# ශුද්ධ වූ අල්-කුර්ආන්
## අරාබි පාඨය සමග
## සිංහල පරිවර්ථනය




# THE HOLY QURAN

## ARABIC TEXT WITH SINHALA TRANSLATION

# The Holy Quran
# Arabic Text with Sinhala Translation



## ශුද්ධ වූ අල්-කුර්ආන්
## අරාබි පාඨය සමග සිංහල පරිවර්තනය

Published under the auspices of
Hazrat Mirza Masroor Ahmad
Fifth Successor of the Promised Messiah[AS]
and Supreme Head of the Worldwide
Ahmadiyya Muslim Jama'at

# The Holy Quran
**Arabic Text with Sinhala Translation**

ප්‍රථම ප්‍රකාශනය - 2015 ශ්‍රී ලංකා
First published in Sri Lanka in 2015



ප්‍රකාශනය
Published by
Islam International Publications Ltd.
Islamabad, Sheephatch Lane
Tilford, Surrey GU10 2AQ
United Kingdom.

මුද්‍රණය
Printed by
Gunaratne Offset (Pvt) Ltd.
235/10, Avissawella Road
Orugodawatta, Wellampitiya
Sri Lanka.

ISBN 978-1-84880-016-8

ලබාගත හැකි ස්ථානය
Available at
Ahmadiyya Muslim Association
619/4, Baseline Road,
Colombo 09 - Sri Lanka.
Tel:-0112687568

# ප්‍රකාශක සටහන

ශුද්ධ වූ අල් කුර්ආනය, ඉස්ලාමයේ වක්තෘ වන මුහම්මද් (සල්) තුමාණන්හට වසර 1400 කට පෙර අති ශ්‍රේෂ්ඨ වූ අල්ලාහ් දෙවියන් විසින් පහළ කරන ලදී. පෙර තිබූ දේව ලියවිලි මෙන් නොව ශුද්ධ වූ අල් කුර්ආනය පහළ වූ දා සිට එහි අක්ෂරයක් හෝ වදනක් හෝ කිසිඳු වෙනසකට භාජනය නොවී පවතින බව මුස්ලිම්වරුන්ගේ දැඩි විශ්වාසය වේ. මෙම අසමසම තත්ත්වය පෙරදිග විද්වතුන්ගෙන් සමහරුන් වන සර් විලියම් මූර් සහ ස්ටැන්ලි ලේන් පූල් යන අය පවා පිළිගෙන ඇත.

සියළුම මනුෂ්‍ය වර්ගයාට පිළිපැදිය හැකි ධාර්මික, සාමාජීය, ආර්ථික සහ සාමූහික ඉගැන්වීම් ශුද්ධ වූ අල් කුර්ආනයේ අන්තර්ගත වී ඇත. ශුද්ධ වූ අල් කුර්ආනය පෞද්ගලික හා සාමූහික වගකීම් සහ යුතුකම් ගැන පැහැදිලිව විස්තර කරයි. එය සමූහයන් අතර සහජීවනය දිරිමත් කරයි. තවද, එය මනුෂ්‍යයන් තුල තිබෙන වෛරයටද, පිළිකුලටද හේතුකාරක වන සියළුම දේ මකා දමයි. ශුද්ධ වූ කුර්ආනය ආගමික නිදහස අදහස් ප්‍රකාශ කිරීමේ නිදහස සහ කථා කිරීමේ නිදහස දිරිමත් කරයි.

මෙම පරිපූර්ණ ඉගැන්වීම ක්‍රියාවට නැංවීමට නම් ලෝවැසි සියළු දෙනාම මෙම ශුද්ධ වූ කුර්ආනය අරාබි බසින් නැතහොත් තමන්ගේ මව් බසින් කියවිය යුතුයි. මේ හේතුව පෙරදැරි කරගෙන පොරොන්දු වූ මෙසායා මෙන්ම ඉමාම් මහ්දි වන හැzස්රත් මිර්zසා ගුලාම් අහ්මද් (අලෛ) තුමාණන් විසින් ස්ථාපිත කරන ලද මෙම ජමාතය මෙම දේව ග්‍රන්ථය ලොව භාෂා ගණනාවකට පරිවර්ථනය කර ඇත.

ශුද්ධ වූ කුර්ආනයේ මෙම සිංහල පරිවර්ථනය අහ්මදියා මුස්ලිම් ජමාතයේ සතරවැනි කලීෆතුල් මසීහ් වන හැzස්රත් මිර්zසා තාහිර් අහ්මද් (රහ්) තුමාණන්ගේ අනුමැතිය සමග ආරම්භ කරන ලදී. ශ්‍රී ලංකාවේ අහ්මදියා මුස්ලිම් ජමාතය ස්ථාපිත කර සිය වසරක් (1915-2015) පරිපූර්ණවීම නිමිත්තෙන් ශුද්ධ වූ අල් කුර්ආනයේ පරිවර්ථනය තවදුරටත් සංශෝධනය කිරීම පිණිස පස්වන කලීෆතුල් මසීහ් හැzස්රත් මිර්zසා මස්රූර් අහ්මද් (අයියදහුල්ලාහ්) තුමාගේ මග පෙන්වීම අනුව කමිටුවක් පත් කරන ලදී.

ශුද්ධ කුර්ආනයේ මෙම සිංහල පරිවර්ථනය සඳහා, දෙවන කලීෆතුල් මසීහ් වන හැzස්රත් මිර්zසා බෂීරුද්දීන් මහ්මූද් අහ්මද් (රලි) තුමාණන්ගේ උර්දු පරිවර්ථනය හා සමහර වැකිවල අර්ථ විවරණයද, හැzස්රත් මව්ලවි ෂේර් අලි (රලි) තුමාණන්ගේ ඉංග්‍රිසි පරිවර්ථනයද, එහි සමහර වැකිවල සතරවන කලීෆතුල් මසීහ් වන හැzස්රත් මිර්zසා තාහිර් අහ්මද් (රහ්) තුමාණන් විසින් කරන ලද විකල්ප පරිවර්ථනද සටහන්ද පදනම් කරනු ලැබිය.

සිංහල බසින් කථා කරන ජනතාවට ඉස්ලාම් ධර්මයේ අති උතුම් වූ දේශනයන් දැන ගැනීමටත් සත්‍යය අවබෝධ කරගැනීමටත් මෙම පරිවර්ථනය මහඟු උපකාරයක් වේ.

මෙම මහඟු කර්තව්‍යය වෙනුවෙන් දිවා රෑ මහන්සි වූ ආර්. බෂීරුද්දීන්, මව්ලවි ඒ. බී. මුෂ්තාක් අහ්මද්, එස්. නිzසාම් කාන්, ඒ. සී. ඉමාන් ෆzසාල් සහ එම්. එන්. ඉහ්සානුල්ලාහ් ෂාහිද් යන අයට අපගේ හෘදයාංගම ස්තුතිය පුද කරමු. අතිශ්‍රේෂ්ඨ අල්ලාහ් මේ සියළු දෙනාටම අතිශයින්ම ආශිර්වාද කරත්වා.

මෙම උතුම් කර්තව්‍යය වෙනුවෙන් ලන්ඩනයේ අතිරේක වකීලුල් තස්නීෆ් වන මුනිරුද්දීන් ශම්ස් මහතාගේ නොමසුරු සහයෝගය, උදව්ව සහ නිරන්තර දිරිගැන්වීමද අපි අගය කොට සලකන්නෙමු.

# පටුන

| පරිච්ඡේදය | | පිටුව |
|---|---|---|

| පරිච්ඡේදය | | පිටුව |
|---|---|---|

පරිච්ඡේදය | පිටුව



<u>සැලකිය යුතුයි</u>

**ඇතැම් වාක්‍යයන්හි වරහන් තුල අමතර වචන යොදා ඇත්තේ එහි අර්ථය තවදුරටත් පැහැදිලිවනු පිණිසය.**



## අල් ෆාතිහා
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ١

2. සියළු ප්‍රශංසා සර්ව ලෝකයන්ටම අධිපතියාණන් වූ අල්ලාහ්ට හිමිය.

ٱلۡحَمۡدُ لِلَّهِ رَبِّ ٱلۡعَٰلَمِينَ ٢

3. මහා කාරුණික, පරම දයාබර,

ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ٣

4. විනිශ්චය දිනයේ අධිපතිය.

مَٰلِكِ يَوۡمِ ٱلدِّينِ ٤

5. අපි ඔබ පමණක් නමදින්නෙමු, ඔබගෙන්ම පමණක් පිහිට පතන්නෙමු.

إِيَّاكَ نَعۡبُدُ وَإِيَّاكَ نَسۡتَعِينُ ٥

6. අප ඍජු මගෙහි යොමු කරනු මැනවි.

ٱهۡدِنَا ٱلصِّرَٰطَ ٱلۡمُسۡتَقِيمَ ٦

*7. (ඔබගේ) අප්‍රසාදයට ලක්වූ අයගේද නොමග ගිය අයගේද (මාර්ගය) නොව, ඔබ ආශිර්වාදය පිරිනැමූ අයගේ මාර්ගය වේ.

صِرَٰطَ ٱلَّذِينَ أَنۡعَمۡتَ عَلَيۡهِمۡ غَيۡرِ ٱلۡمَغۡضُوبِ عَلَيۡهِمۡ وَلَا ٱلضَّآلِّينَ ٧

* සටහන. 7: මෙහිදී මග්සූබ්( مَغۡضُوبِ ) යනු යුදෙව්වන් විසින් අත් කරගත් දෙවියන්ගේ කෝපයට පමණක් සීමා වන බව තේරුම් ගැනීමට වරහන් ඇතුලත වූ 'ඔබගේ' යන පදය තුලින් පාඨකයා මුලා නොවිය යුතුය. මෙම පදය දෙවියන්ගේ කෝපයට පමණක් සීමා නොවන අතර මිනිසුන්ගෙන් අත්කර ගන්නාවූ කෝපයද අදහස් කරයි.



## අල් බකරා
(මදීනාහිදී පහළ වුවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1-කොටස

2. අලිෆ් ලාම් මීම්.◆

الٓمٓ ②

3. මෙය පරිපූර්ණ ග්‍රන්ථයකි. මෙහි කිසිඳු සැකයක් නැත. (මෙය) බිය බැතිමතුන්ට යහමග පෙන්වන්නක්(වේ).

ذٰلِكَ الْكِتٰبُ لَا رَيْبَ فِيْهِ هُدًى لِّلْمُتَّقِيْنَ ③

4. ඔවුන් අදෘශ්‍යමාන දේ කෙරෙහි විශ්වාස කරන අතර නැමදුමෙහිද නිරත වෙති. තවද අප ඔවුන්ට දුන් දෙයින් වැය කරන්නෝය.

الَّذِيْنَ يُؤْمِنُوْنَ بِالْغَيْبِ وَ يُقِيْمُوْنَ الصَّلٰوةَ وَ مِمَّا رَزَقْنٰهُمْ يُنْفِقُوْنَ ④

5. තවද ඔබ වෙත පහළ කරන ලද දෙයද ඔබට පෙර පහළ කරන ලද දෙයද ඔවුහු විශ්වාස කරති. තවද (මතු) පැමිණෙන දේ කෙරෙහිද ඔවුහු දැඩි විශ්වාසය තබන්නෝය.

وَالَّذِيْنَ يُؤْمِنُوْنَ بِمَآ اُنْزِلَ اِلَيْكَ وَمَآ اُنْزِلَ مِنْ قَبْلِكَ وَ بِالْاٰخِرَةِ هُمْ يُوْقِنُوْنَ ⑤

6. තම අධිපතියාණන්ගේ මගපෙන්වීම පිළිපදින අය ඔවුන්මය, තවද සමෘධිමත් වන අයද ඔවුන්මය.

اُولٰٓئِكَ عَلٰى هُدًى مِّنْ رَّبِّهِمْ وَ اُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ⑥

7. අවිශ්වාස කළ වුනට ඔබ අවවාද කළද, අවවාද නොකළද, එය ඔවුනට එක හා සමානය. ඔවුහු විශ්වාස නොකරන්නෝය.

اِنَّ الَّذِيْنَ كَفَرُوْا سَوَآءٌ عَلَيْهِمْ ءَاَنْذَرْتَهُمْ اَمْ لَمْ تُنْذِرْهُمْ لَا يُؤْمِنُوْنَ ⑦

8. අල්ලාහ් ඔවුන්ගේ සිත්හිද, ඔවුන්ගේ කන්හිද මුද්‍රාව තැබුවේය. තවද ඔවුන්ගේ ඇස්මත තිරයක්ද (යොදා) ඇත. තවද ඔවුනට අතිමහත්වූ දඬුවමක්ද ඇත.

خَتَمَ اللّٰهُ عَلٰى قُلُوْبِهِمْ وَعَلٰى سَمْعِهِمْ وَ عَلٰٓى اَبْصَارِهِمْ غِشَاوَةٌ وَّ لَهُمْ عَذَابٌ عَظِيْمٌ ⑧

◆ මම අල්ලාහ්, සියල්ල දන්නා.

وَمِنَ النَّاسِ مَنْ يَّقُوْلُ اٰمَنَّا بِاللّٰهِ وَبِالْيَوْمِ الْاٰخِرِ وَمَا هُمْ بِمُؤْمِنِيْنَ ۝٩

وقف لازم

9. තවද මිනිසුන් අතුරෙන් සමහරෙක්, 'අපි අල්ලාහ් කෙරෙහිද අවසන් දිනය කෙරෙහිද විශ්වාස කොට ඇත්තෙමු' යි කියති. එහෙත් ඔවුහු කිසිසේත්ම විශ්වාසිතයින් නොවෙති.

يُخٰدِعُوْنَ اللّٰهَ وَالَّذِيْنَ اٰمَنُوْا ۚ وَمَا يَخْدَعُوْنَ اِلَّآ اَنْفُسَهُمْ وَمَا يَشْعُرُوْنَ ۝١٠

10. ඔවුහු අල්ලාහ්වද, විශ්වාස කළ අයවද මුලා කිරීමට තැත් කරති. නමුත් ඔවුහු, තමන්වම මිස අන් කිසිවෙකු මුලා නොකරති. තවද ඔවුහු (එය) වටහා නොගනිති.

فِىْ قُلُوْبِهِمْ مَّرَضٌ ۙ فَزَادَهُمُ اللّٰهُ مَرَضًا ۚ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ۢ ۙ بِمَا كَانُوْا يَكْذِبُوْنَ ۝١١

11. ඔවුන්ගේ හදවත් තුළ රෝගයක් විය. පසුව අල්ලාහ් ඔවුන්ගේ රෝගය තවදුරටත් වැඩි කළේය. තවද ඔවුන් බොරු පවසමින් සිටි නිසා ඔවුන්ට වේදනීය දඬුවමක් ඇත.

وَاِذَا قِيْلَ لَهُمْ لَا تُفْسِدُوْا فِى الْاَرْضِ ۙ قَالُوْٓا اِنَّمَا نَحْنُ مُصْلِحُوْنَ ۝١٢

12. තවද 'පොළොවෙහි කලබල ඇති නොකරනු' යි ඔවුනට පවසනු ලැබූ කල්හි, 'අපි සාමය පමණක් ප්‍රචලිත කරන්නන් වෙමු' යි ඔවුහු කියති.

اَلَآ اِنَّهُمْ هُمُ الْمُفْسِدُوْنَ وَلٰكِنْ لَّا يَشْعُرُوْنَ ۝١٣

13. ප්‍රවේශම් වනු! නියත වශයෙන්ම කලබල ඇති කරන්නෝ මොවුහුමය. එහෙත් මොවුහු (එය) වටහා නොගනිති.

وَاِذَا قِيْلَ لَهُمْ اٰمِنُوْا كَمَآ اٰمَنَ النَّاسُ قَالُوْٓا اَنُؤْمِنُ كَمَآ اٰمَنَ السُّفَهَآءُ ۗ اَلَآ اِنَّهُمْ هُمُ السُّفَهَآءُ وَلٰكِنْ لَّا يَعْلَمُوْنَ ۝١٤

14. තවද '(අනෙක්) ජනතාව විශ්වාස කළ පරිදි නුඹලාද විශ්වාස කරනු'යි ඔවුනට පවසනු ලැබූ විට, 'අඥානයින් විශ්වාස කරන්නාක් මෙන් අපත් විශ්වාස කළ යුතුදැ?'යි ඔවුහු කියති. ප්‍රවේශම් වනු! නියත වශයෙන්ම අඥානයෝ මොවුහුම වෙති. එහෙත් මොවුහු නොදනිති.

وَاِذَا لَقُوا الَّذِيْنَ اٰمَنُوْا قَالُوْٓا اٰمَنَّا ۚ وَاِذَا خَلَوْا اِلٰى شَيٰطِيْنِهِمْ ۙ قَالُوْٓا اِنَّا مَعَكُمْ ۙ اِنَّمَا نَحْنُ مُسْتَهْزِءُوْنَ ۝١٥

15. තවද ඔවුන් විශ්වාස කරන්නවුන් හමුවන විටදී 'අපි විශ්වාස කරන්නෙමු' යි කියති. නමුත් ඔවුහු තමන්ගේ කල්ලි නායකයින් සමග හුදකලාවේ සිටින විටදී, 'ඇත්තෙන්ම අපි නුඹලා සමඟ සිටින්නෙමු. අපි සරදම් කරමින් පමණක් සිටින්නෙමු' යි කියති.

16. අල්ලාහ් ඔවුන්ගේ සරදම් කිරීම හේතුකොට ගෙන ඔවුනට දඬුවම් කරන්නේය. තවද ඔවුන්ගේ සීමාව ඉක්මවීමෙහි, අන්ධව අයාලේ යාමට නිරතුරුවම ඉඩ හරින්නේය.

اَللّٰهُ يَسْتَهْزِئُ بِهِمْ وَيَمُدُّهُمْ فِىْ طُغْيَانِهِمْ يَعْمَهُوْنَ ١٦

17. යහමාර්ගය වෙනුවට දුර්මාර්ගය හුවමාරු කළවුන් මොවුහුමය. එහෙත් මොවුන්ගේ අයවැ ගනුදෙනුව මොවුනට කිසිඳු ඵලක් ගෙන නොදුනි. මොවුහු හරිමග පමුණුවනු ලද්දන්ද නොවූහ.

اُولٰٓئِكَ الَّذِيْنَ اشْتَرَوُا الضَّلٰلَةَ بِالْهُدٰى ۖ فَمَا رَبِحَتْ تِّجَارَتُهُمْ وَمَا كَانُوْا مُهْتَدِيْنَ ١٧

18. මොවුන්ගේ උපමාව ගිනි මොළවන්නෙකුගේ උපමාව බඳුය. එය ඔහු වටා ආලෝකමත් වූ කල්හි අල්ලාහ් ඔවුන්ගේ ආලෝකය ඉවත් කර, මොවුන් දැකිය නොහැකි තත්ත්වයකට මොවුන්ව ඝන අන්ධකාරයෙහි හැර දැමීය.

مَثَلُهُمْ كَمَثَلِ الَّذِى اسْتَوْقَدَ نَارًا ۚ فَلَمَّآ اَضَآءَتْ مَا حَوْلَهٗ ذَهَبَ اللّٰهُ بِنُوْرِهِمْ وَتَرَكَهُمْ فِىْ ظُلُمٰتٍ لَّا يُبْصِرُوْنَ ١٨

*19. (මොවුහු) බිහිරිය ගොළුය අන්ධය. එබැවින් මොවුහු පෙරළා නොපැමිණෙන්නෝය.

صُمٌّۢ بُكْمٌ عُمْىٌ فَهُمْ لَا يَرْجِعُوْنَ ١٩ ۙ

20. නැතහොත් (එය) ඝන අඳුරු, අකුණු පහර සහ විදුලි කෙටීමෙන්ද යුත් වලාකුළින් ඇද හැලෙනා තද වර්ෂාවක් බඳුය. අකුණු හඬ නිසා මරණ බියෙන් මොවුහු තමන්ගේ ඇඟිලි සිය කන්හි ගසා ගනිති. තවද අල්ලාහ් අවිශ්වාසීතයින් වටලන්නේය.

اَوْ كَصَيِّبٍ مِّنَ السَّمَآءِ فِيْهِ ظُلُمٰتٌ وَّرَعْدٌ وَّبَرْقٌ ۚ يَجْعَلُوْنَ اَصَابِعَهُمْ فِىْٓ اٰذَانِهِمْ مِّنَ الصَّوَاعِقِ حَذَرَ الْمَوْتِ ۗ وَاللّٰهُ مُحِيْطٌۢ بِالْكٰفِرِيْنَ ٢٠

21. විදුලිය මොවුන්ගේ දෘෂ්ඨිය පැහැර ගැනීමට ආසන්න විය. මොවුන්මත එය දිස්වන සෑමවිටම මොවුහු එහි ඇවිදිති. මොවුන්මත අඳුර වැටෙත්ම මොවුහු නිසල වෙති. අල්ලාහ් කැමති වූයේ නම්, මොවුන්ගේ ශ්‍රවණයද, මොවුන්ගේ

يَكَادُ الْبَرْقُ يَخْطَفُ اَبْصَارَهُمْ ۗ كُلَّمَآ اَضَآءَ لَهُمْ مَّشَوْا فِيْهِ ۙ وَاِذَآ اَظْلَمَ عَلَيْهِمْ قَامُوْا ۗ وَلَوْ شَآءَ اللّٰهُ لَذَهَبَ

*සටහන. 19: මෙම පාඨය කුහක පිරිසට යෙදිය හැකිය. මන්ද ඔවුන් සත්‍යය කථා කිරීමට හෝ සත්‍යය ඇසීමට හෝ සත්‍යය දැකීමට හෝ අකැමැති බැවින් ඔවුන්ව අන්ධ, ගොළු, බිහිරි යැයි සඳහන් කර ඇත. එබැවින් ඔවුන් උවමනාවෙන්ම තම හැකියාවන් ප්‍රතික්ෂේප කරමින් තමන්වම සිරකරගෙන ඇත.

بِسَمْعِهِمْ وَأَبْصَارِهِمْ ۚ إِنَّ اللَّهَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٢١﴾

දෘෂ්ඨියද ඔහු විසින් පැහැර ගැනීමට තිබුනි. නියතවශයෙන්ම, අල්ලාහ් සියලු දේ කෙරෙහි බලය ඇත්තාය.

يَا أَيُّهَا النَّاسُ اعْبُدُوا رَبَّكُمُ الَّذِي خَلَقَكُمْ وَالَّذِينَ مِنْ قَبْلِكُمْ لَعَلَّكُمْ تَتَّقُونَ ﴿٢٢﴾

22. එම්බල මිනිසුනි! නුඹලා බිය බැතිමතුන් වනු පිණිස, නුඹලාවද නුඹලාට පෙර සිටියවුන්වද මැවූ නුඹලාගේ අධිපතියාණන් නමදිනු.

الَّذِي جَعَلَ لَكُمُ الْأَرْضَ فِرَاشًا وَالسَّمَاءَ بِنَاءً وَأَنْزَلَ مِنَ السَّمَاءِ مَاءً فَأَخْرَجَ بِهِ مِنَ الثَّمَرَاتِ رِزْقًا لَكُمْ ۖ فَلَا تَجْعَلُوا لِلَّهِ أَنْدَادًا وَأَنْتُمْ تَعْلَمُونَ ﴿٢٣﴾

23. නුඹලා වෙනුවෙන් පොළොව යහනක් ලෙසද, අහස වියනක් ලෙසද නිර්මාණය කළේ ඔහුය. තවද වළාකුළුවලින් ජලයද පහළ කළේය. එමගින් නුඹලාගේ පැවැත්මට පළතුරුද හටගැන්විය. එබැවින් නුඹලා දැනුවත්ව අල්ලාහ්ට සමානයන් ඇති නොකරනු.

وَإِنْ كُنْتُمْ فِي رَيْبٍ مِمَّا نَزَّلْنَا عَلَىٰ عَبْدِنَا فَأْتُوا بِسُورَةٍ مِنْ مِثْلِهِ وَادْعُوا شُهَدَاءَكُمْ مِنْ دُونِ اللَّهِ إِنْ كُنْتُمْ صَادِقِينَ ﴿٢٤﴾

24. තවද අප අපගේ දාසයා වෙත පහළ කළ දේ ගැන නුඹලා සැකයෙහි සිටින්නේ නම්, මෙවන් පරිච්ඡේදයක් ඉදිරිපත් කරනු. තවද නුඹලා සත්‍යවාදීන් නම්, අල්ලාහ් හැර නුඹලාගේ උදව්කරුවන්ද කැඳවනු.

فَإِنْ لَمْ تَفْعَلُوا وَلَنْ تَفْعَلُوا فَاتَّقُوا النَّارَ الَّتِي وَقُودُهَا النَّاسُ وَالْحِجَارَةُ ۖ أُعِدَّتْ لِلْكَافِرِينَ ﴿٢٥﴾

25. නුඹලා (එය) නොකළේ නම්, කිසිවිටෙකත් නුඹලා (එය) නොකරනු ඇත. එසේනම්, මිනිසුන්ද ගල්ද ඉන්ධන වන්නාවූ ගින්නෙන් ආරක්ෂා වනු. (එය) අවිශ්වාසීනයින් උදෙසාම සූදානම් කරන ලද්දකි.

وَبَشِّرِ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ أَنَّ لَهُمْ جَنَّاتٍ تَجْرِي مِنْ تَحْتِهَا الْأَنْهَارُ ۖ كُلَّمَا رُزِقُوا مِنْهَا مِنْ ثَمَرَةٍ رِزْقًا ۙ قَالُوا

26. තවද විශ්වාස කර යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන් සඳහා, පහළින් ගලා බසිනා දියදහරාවලින් යුත් උද්‍යානයන් ගැන ශුභාරංචිය දෙනු. එහි පළතුරුවලින් කොටසක් ඔවුන්හට දෙනු ලබන සෑම විටම 'මේවා අපට මීට පෙර දෙනු ලැබූ

هَٰذَا الَّذِي رُزِقْنَا مِن قَبْلُ ۖ وَأُتُوا بِهِ مُتَشَابِهًا ۖ وَلَهُمْ فِيهَا أَزْوَاجٌ مُّطَهَّرَةٌ ۖ وَهُمْ فِيهَا خَالِدُونَ ﴿٢٦﴾

ඒවා යැ'යි ඔවුන් කියනු ඇත. තවද මේවාට සමාන දේවල් ඔවුනට ගෙන එනු ලබන්නේය. තවද එහි ඔවුන්ට පරිපූර්ණයෙන් පවිත්‍රවූ සහකරුවන්ද ඇත. තවද ඔවුහු එහිම සදාකල් වෙසෙන්නෝය.

إِنَّ اللَّهَ لَا يَسْتَحْيِي أَن يَضْرِبَ مَثَلًا مَّا بَعُوضَةً فَمَا فَوْقَهَا ۚ فَأَمَّا الَّذِينَ آمَنُوا فَيَعْلَمُونَ أَنَّهُ الْحَقُّ مِن رَّبِّهِمْ ۖ وَأَمَّا الَّذِينَ كَفَرُوا فَيَقُولُونَ مَاذَا أَرَادَ اللَّهُ بِهَٰذَا مَثَلًا ۘ يُضِلُّ بِهِ كَثِيرًا وَيَهْدِي بِهِ كَثِيرًا ۚ وَمَا يُضِلُّ بِهِ إِلَّا الْفَاسِقِينَ ﴿٢٧﴾

27. ඇත්තෙන්ම අල්ලාහ් කුඩා මදුරුවෙකු හෝ ඊටත් කුඩා දෙයක් හෝ උපමාවක් ලෙස ගෙන හැර පෑමට සුළු කොට නොතකයි. විශ්වාස කරන අය මෙය තමන්ගේ අධිපතියාණන් වෙතින් වන සත්‍යයක් යැයි දැනගන්නෝය. විශ්වාස නොකරන අය 'අල්ලාහ් මෙම උපමාවෙන් අදහස් කරන්නේ කුමක්දැ?'යි විමසති. මෙමගින් ඔහු බොහෝ අයව නොමග ගියවුන් ලෙස තීරණය කරන අතර මෙමගින් ඔහු බොහෝ අයව යහමගට යොමු කරන්නේය. තවද ඔහු මෙමගින් අකීකරුවන් මිස අන් කිසිවෙකුත් වැරදි කළවුන් යැයි තීන්දු නොකරයි.

الَّذِينَ يَنقُضُونَ عَهْدَ اللَّهِ مِن بَعْدِ مِيثَاقِهِ وَيَقْطَعُونَ مَا أَمَرَ اللَّهُ بِهِ أَن يُوصَلَ وَيُفْسِدُونَ فِي الْأَرْضِ ۚ أُولَٰئِكَ هُمُ الْخَاسِرُونَ ﴿٢٨﴾

28. ඔවුහු අල්ලාහ්ගේ ගිවිසුම ස්ථිර කළ පසු එය කඩකරන අතර එක්සත් කරවීමට අල්ලාහ් අණකළ දේ බිඳ දමති. පොළොවෙහි කලබලද ඇති කරති. මොවුහුම පාඩු විඳින්නෝය.

كَيْفَ تَكْفُرُونَ بِاللَّهِ وَكُنتُمْ أَمْوَاتًا فَأَحْيَاكُمْ ۖ ثُمَّ يُمِيتُكُمْ ثُمَّ يُحْيِيكُمْ ثُمَّ إِلَيْهِ تُرْجَعُونَ ﴿٢٩﴾

29. නුඹලා අල්ලාහ් කෙරෙහි විශ්වාස නොකරන්නේ කෙසේද? නුඹලා අප්‍රාණිකව සිටි අවස්ථාවේදී, ඔහු නුඹලාට ජීවය ලබා දුන්නේය. පසුව ඔහු නුඹලාව මරණයට පත් කරන්නේය. අනතුරුව නුඹලාට ජීවය ලබාදෙන්නේය. මින්පසු නුඹලා නැවත ගෙනයනු ලබන්නේ ඔහු වෙතටමය.

هُوَ الَّذِي خَلَقَ لَكُم مَّا فِي الْأَرْضِ جَمِيعًا ثُمَّ اسْتَوَىٰ إِلَى السَّمَاءِ فَسَوَّاهُنَّ سَبْعَ سَمَاوَاتٍ ۚ وَهُوَ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿٣٠﴾

30. පොළොවෙහි ඇති සියලු දේ නුඹලා උදෙසා උත්පාදනය කළේ ඔහුමය. පසුව ඔහු අහස් වෙත යොමු වී ඔහු ඒවා අහස් සතක් ලෙස පරිපූර්ණ කළේය. ඔහු සියලුම දේ දන්නේය.

وَ اِذْ قَالَ رَبُّكَ لِلْمَلٰٓئِكَةِ اِنِّىْ جَاعِلٌ فِى الْاَرْضِ خَلِيْفَةً ؕ قَالُوْٓا اَتَجْعَلُ فِيْهَا مَنْ يُّفْسِدُ فِيْهَا وَ يَسْفِكُ الدِّمَآءَ ۚ وَنَحْنُ نُسَبِّحُ بِحَمْدِكَ وَنُقَدِّسُ لَكَ ؕ قَالَ اِنِّىْٓ اَعْلَمُ مَا لَا تَعْلَمُوْنَ ﴿٣١﴾

31. තවද ඔබගේ අධිපතියාණන් සුරදූතයින් අමතා, 'මම පොළොවෙහි නියෝජිතයෙකු පත්කරන්නට යමි' යි කියූ කල්හි, 'එහි කලබල ඇතිකරමින් ලේ වගුරුවන්නෙකු පත්කිරීමට යන්නෙහිද? තවද අපි ඔබගේ ප්‍රශංසාවෙන් ඔබ සුවිශුද්ධ කරමින් ඔබගේ ශුද්ධත්වය කීර්තිමත් කරමු' යි ඔවුහු කීහ. 'නුඹලා නොදන්නා දේ මම දනිමි' යි ඔහු කීවේය.

وَعَلَّمَ اٰدَمَ الْاَسْمَآءَ كُلَّهَا ثُمَّ عَرَضَهُمْ عَلَى الْمَلٰٓئِكَةِ ۙ فَقَالَ اَنْۢبِئُوْنِىْ بِاَسْمَآءِ هٰٓؤُلَآءِ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٣٢﴾

32. තවද ඔහු ආදම්ට සියළු නාමයන් ඉගැන්වූයේය. පසුව ඔහු මේවා(එම නාමයන්ට හිමි දේවල්) සුරදූතයන් ඉදිරියෙහි තබා, 'නුඹලා නිවැරදි නම් මේවායේ නාමයන් මා හට පවසනු' යි කීවේය.

قَالُوْا سُبْحٰنَكَ لَا عِلْمَ لَنَآ اِلَّا مَا عَلَّمْتَنَا ؕ اِنَّكَ اَنْتَ الْعَلِيْمُ الْحَكِيْمُ ﴿٣٣﴾

33. 'ඔබ සුවිශුද්ධය! ඔබ අපට ඉගැන්වූ දේ හැර වෙනත් දැනුමක් අපට නැත්තේය. ඇත්තෙන්ම ඔබ සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නයා' යි ඔවුහු කීහ.

قَالَ يٰٓاٰدَمُ اَنْۢبِئْهُمْ بِاَسْمَآئِهِمْ ۚ فَلَمَّآ اَنْۢبَاَهُمْ بِاَسْمَآئِهِمْ ۙ قَالَ اَلَمْ اَقُلْ لَّكُمْ اِنِّىْٓ اَعْلَمُ غَيْبَ السَّمٰوٰتِ وَ الْاَرْضِ ۙ وَ اَعْلَمُ مَا تُبْدُوْنَ وَمَا كُنْتُمْ تَكْتُمُوْنَ ﴿٣٤﴾

34. 'එම්බා ආදම්! මොවුනට මේවායේ නාමයන් පවසන්නැ'යි ඔහු (අල්ලාහ්) කීවේය. පසුව ඔහු මොවුනට ඒවායේ නාමයන් පැවසූ කල්හි, 'මම අහස්හිද පොළොවෙහිද සැඟවුණු දේ දනිමි. නුඹලා එළි කරන දේත් නුඹලා සඟවන දේත් මම දනිමි. මම නුඹලාට එය නොකීවෙම් දැ?'යි ඔහු ඇසුවේය.

وَاِذْ قُلْنَا لِلْمَلٰٓئِكَةِ اسْجُدُوْا لِاٰدَمَ فَسَجَدُوْٓا اِلَّآ اِبْلِيْسَ ؕ اَبٰى وَاسْتَكْبَرَ ۖ وَكَانَ مِنَ الْكٰفِرِيْنَ ﴿٣٥﴾

35. තවද 'ආදම්ට අවනත වනු'යි අප සුරදූතයින්ට කියූ කල්හි (එම අවස්ථාව සිහි කරනු.) ඉබ්ලීස් හැර, ඔවුහු (සියල්ලන්ම) අවනත වූහ. ඔහු ප්‍රතික්ෂේප කර ගර්වයෙන් ක්‍රියා කළේය. තවද ඔහු අවිශ්වාසිතයින් අතර විය.

وَقُلْنَا يٰٓاٰدَمُ اسْكُنْ اَنْتَ وَزَوْجُكَ الْجَنَّةَ وَكُلَا مِنْهَا رَغَدًا حَيْثُ شِئْتُمَا ۪ وَلَا تَقْرَبَا هٰذِهِ الشَّجَرَةَ فَتَكُوْنَا مِنَ الظّٰلِمِيْنَ ﴿٣٦﴾

36. තවද 'එම්බා ආදම්! ඔබද ඔබගේ බිරිඳද උද්‍යානයෙහි වාසය කරනු. තවද ඔබලා මෙයින් ඕනෑම තැනකින් ඇතිතරම් අනුභව කරනු. එහෙත් මෙම ගසට ළඟා නොවනු. නැතහොත් ඔබලා වරදකරුවන් වන්නේයැ'යි අපි කීවෙමු.

فَاَزَلَّهُمَا الشَّيْطٰنُ عَنْهَا فَاَخْرَجَهُمَا مِمَّا كَانَا فِيْهِ ۪ وَقُلْنَا اهْبِطُوْا بَعْضُكُمْ لِبَعْضٍ عَدُوٌّ ۚ وَلَكُمْ فِى الْاَرْضِ مُسْتَقَرٌّ وَّمَتَاعٌ اِلٰى حِيْنٍ ﴿٣٧﴾

37. එහෙත් ෂෙයිතාන් එමගින් ඔවුන් දෙදෙනාවම වරදට හසු කොට ඔවුන් කවර තත්ත්වයේ සිටියද (එම තත්ත්වයෙන්) ඔවුන්ව බැහැර කළේය. එබැවින් 'නුඹලා පිටවනු. නුඹලාගෙන් සමහරෙක් අන් සමහරෙකුට සතුරන් වෙති. තවද නුඹලාට කලකට පොළොවෙහි වාසස්ථානයක්ද, ජීවිකාවට අවශ්‍ය දේද, ඇතැ'යි අපි කීවෙමු.

فَتَلَقّٰٓى اٰدَمُ مِنْ رَّبِّهٖ كَلِمٰتٍ فَتَابَ عَلَيْهِ ؕ اِنَّهٗ هُوَ التَّوَّابُ الرَّحِيْمُ ﴿٣٨﴾

38. පසුව ආදම් තම අධිපතියාණන්ගෙන් (නැමදුමෙහි) ඇතැම් වදන් ඉගෙන ගත්තේය. එබැවින් ඔහු (අල්ලාහ්) දයාවෙන් යුතුව ඔහු වෙත හැරුණේය. නියතවශයෙන්ම ඔහු (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය. (තවද) දයානුකම්පිතය.

قُلْنَا اهْبِطُوْا مِنْهَا جَمِيْعًا ۚ فَاِمَّا يَاْتِيَنَّكُمْ مِّنِّىْ هُدًى فَمَنْ تَبِعَ هُدَاىَ فَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُوْنَ ﴿٣٩﴾

39. 'නුඹලා සියල්ලන්ම මෙයින් පිටවනු. තවද මාගෙන් නුඹලාට මගපෙන්වීම පැමිණෙන කල්හි, මාගේ මගපෙන්වීම යමෙක් අනුගමනය කරන්නේද ඔවුන් කෙරෙහි කිසිඳු බියක් නොවන්නේය. ඔවුන් ශෝක වන්නේද නැතැ'යි අපි පැවසුවෙමු.

وَالَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَآ اُولٰٓئِكَ اَصْحٰبُ النَّارِ ۚ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿٤٠﴾ ع

40. නමුත් අවිශ්වාස කර අපගේ සලකුණු අසත්‍ය ලෙස සළකන මොවුහු නිරයේ ගින්නෙහි සහකරුවෝය. මොවුහු එහිම වෙසෙන්නෝය.

يٰبَنِىْٓ اِسْرَآءِيْلَ اذْكُرُوْا نِعْمَتِىَ الَّتِىْٓ اَنْعَمْتُ عَلَيْكُمْ وَاَوْفُوْا بِعَهْدِىْٓ اُوْفِ بِعَهْدِكُمْ ۚ وَاِيَّاىَ فَارْهَبُوْنِ ﴿٤١﴾

41. එම්බල ඉස්රාඊල් දරුවනි! මා නුඹලාට දැක්වූ මාගේ අනුග්‍රහය සිහිපත් කරනු. තවද නුඹලා මා සමඟ වූ ගිවිසුම ඉටු කරනු. මම නුඹලා සමඟ වූ ගිවිසුම ඉටු කරන්නෙමි. තවද නුඹලා මා හට පමණක් බිය වනු.

| | |
|---|---|
| 42. තවද නුඹලා වෙත ඇති දේ සම්පූර්ණ කරන්නාවූ මා පහළ කළ දේ මත විශ්වාසය තබනු. තවද එය අවිශ්වාසය කිරීමෙහිලා ප්‍රථමයා නොවනු. තවද මාගේ සළකුණු අල්ප මිළකට හුවමාරු නොකරනු. තවද මා තුළම ආරක්ෂාව පතනු. | وَاٰمِنُوْا بِمَآ اَنْزَلْتُ مُصَدِّقًا لِّمَا مَعَكُمْ وَلَا تَكُوْنُوْٓا اَوَّلَ كَافِرٍۢ بِهٖ ۠ وَلَا تَشْتَرُوْا بِاٰيٰتِىْ ثَمَنًا قَلِيْلًا ۡ وَاِيَّاىَ فَاتَّقُوْنِ ﴿٤٢﴾ |
| 43. තවද දැනුවත්ව සත්‍යය අසත්‍යය සමඟ මිශ්‍ර නොකරනු, එසේම සත්‍යය නොසඟවනු. | وَلَا تَلْبِسُوا الْحَقَّ بِالْبَاطِلِ وَتَكْتُمُوا الْحَقَّ وَاَنْتُمْ تَعْلَمُوْنَ ﴿٤٣﴾ |
| 44. තවද නමස්කාරයෙහි නිරතවනු, තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු, තවද නමස්කාරය කරන්නවුන් සමඟ නමස්කාරය කරනු. | وَاَقِيْمُوا الصَّلٰوةَ وَاٰتُوا الزَّكٰوةَ وَارْكَعُوْا مَعَ الرّٰكِعِيْنَ ﴿٤٤﴾ |
| 45. නුඹලා පුස්තකය හදාරමින්, අනුන්ට යහපත් ක්‍රියා කිරීම සඳහා අණකරමින් තමන්වම අමතක කරන්නෙහුද? එසේනම් නුඹලා වටහා නොගන්නෙහුද? | اَتَاْمُرُوْنَ النَّاسَ بِالْبِرِّ وَتَنْسَوْنَ اَنْفُسَكُمْ وَاَنْتُمْ تَتْلُوْنَ الْكِتٰبَ ؕ اَفَلَا تَعْقِلُوْنَ ﴿٤٥﴾ |
| 46. තවද ඉවසීම හා නමස්කාරය මගින් පිහිට පතනු. ඇත්තෙන්ම නිහතමානීවන්නන්ට හැර මෙය දුෂ්කර දෙයකි. | وَاسْتَعِيْنُوْا بِالصَّبْرِ وَالصَّلٰوةِ ؕ وَاِنَّهَا لَكَبِيْرَةٌ اِلَّا عَلَى الْخٰشِعِيْنَ ﴿٤٦﴾ |
| 47. ඔවුහු තමන්ගේ අධිපතියාණන් හමුවන්නන් යැයිද, ඔවුන් ඔහු වෙතටම ආපසු යන්නන් යැයිද ස්ථිරවම දන්නෝය. | الَّذِيْنَ يَظُنُّوْنَ اَنَّهُمْ مُّلٰقُوْا رَبِّهِمْ وَاَنَّهُمْ اِلَيْهِ رٰجِعُوْنَ ﴿٤٧﴾ ع |
| 48. එම්බල ඉස්රාඊල් දරුවනි! මා නුඹලාට දැක්වූ මාගේ අනුග්‍රහයද, (එම කාලයේ) අන් ජනතාවට වඩා මා නුඹලා උසස් කළ ආකාරයද සිහිපත් කරනු. | يٰبَنِىْٓ اِسْرَآءِيْلَ اذْكُرُوْا نِعْمَتِىَ الَّتِىْٓ اَنْعَمْتُ عَلَيْكُمْ وَاَنِّىْ فَضَّلْتُكُمْ عَلَى الْعٰلَمِيْنَ ﴿٤٨﴾ |

49. තවද එක් ආත්මයක් වෙනුවට තවත් ආත්මයක් කිසිසේත් ඉදිරිපත් විය නොහැකි වන්නාවූද, එයට මැදිහත්වීමක් භාරගනු නොලබන්නාවූද, එයගෙන් වන්දියක් හෝ ගනු නොලබන්නාවූද, ඔවුන්ට උදව් කරනු නොලබන්නාවූද දිනයට බියවනු.

وَاتَّقُوْا يَوْمًا لَّا تَجْزِىْ نَفْسٌ عَنْ نَّفْسٍ
شَيْـًٔا وَّلَا يُقْبَلُ مِنْهَا شَفَاعَةٌ وَّلَا يُؤْخَذُ
مِنْهَا عَدْلٌ وَّلَا هُمْ يُنْصَرُوْنَ ﴿٤٩﴾

50. තවද නුඹලාගේ පුතුන් ඝාතනය කරමින්, නුඹලාගේ ස්ත්‍රීන් ඉතුරු කරමින් නුඹලාට දරුණු වද හිංසා කළ ෆිර්අවුන්ගේ මිනිසුන්ගෙන් අප නුඹලා මුදවා ගත් අවස්ථාව (සිහිපත් කරනු.) තවද එහි නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලාට මහත්වූ පිරික්සුමක් විය.

وَاِذْ نَجَّيْنٰكُمْ مِّنْ اٰلِ فِرْعَوْنَ
يَسُوْمُوْنَكُمْ سُوْٓءَ الْعَذَابِ يُذَبِّحُوْنَ
اَبْنَآءَكُمْ وَيَسْتَحْيُوْنَ نِسَآءَكُمْ ؕ وَفِىْ
ذٰلِكُمْ بَلَآءٌ مِّنْ رَّبِّكُمْ عَظِيْمٌ ﴿٥٠﴾

51. තවද අප නුඹලා වෙනුවෙන් මුහුද වෙන් කර, නුඹලාව ආරක්ෂා කර, නුඹලා බලාසිටියදීම ෆිර්අවුන්ගේ ජනයා ගිල්වා දැමූ අවස්ථාවද (සිහිපත් කරනු.)

وَاِذْ فَرَقْنَا بِكُمُ الْبَحْرَ فَاَنْجَيْنٰكُمْ وَاَغْرَقْنَآ
اٰلَ فِرْعَوْنَ وَاَنْتُمْ تَنْظُرُوْنَ ﴿٥١﴾

52. තවද අප මූසාට සතලිස් රාත්‍රියෙහි පොරොන්දුව දුන් අවස්ථාව (සිහිපත් කරනු.) පසුව ඔහු නැති විටෙකදී නුඹලා වසු පැටවෙකු (ඇදහීමට) ගත්තෙහුය. තවද නුඹලා සීමාව ඉක්මවන්නන් වූහ.

وَاِذْ وٰعَدْنَا مُوْسٰٓى اَرْبَعِيْنَ لَيْلَةً ثُمَّ
اتَّخَذْتُمُ الْعِجْلَ مِنْۢ بَعْدِهٖ وَاَنْتُمْ ظٰلِمُوْنَ ﴿٥٢﴾

53. පසුව නුඹලා ස්තුතිවන්ත වනු පිණිස අපි නුඹලාට ක්ෂමාව දුනිමු.

ثُمَّ عَفَوْنَا عَنْكُمْ مِّنْۢ بَعْدِ ذٰلِكَ لَعَلَّكُمْ
تَشْكُرُوْنَ ﴿٥٣﴾

54. තවද නුඹලා යහමග යවනු පිණිස අප මූසාට පුස්තකයද, විමංසනයද දුන් අවස්ථාව (සිහිපත් කරනු.)

وَاِذْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ وَالْفُرْقَانَ
لَعَلَّكُمْ تَهْتَدُوْنَ ﴿٥٤﴾

55. තවද 'එම්බල මාගේ ජනතාවනි! ඇත්තෙන්ම නුඹලා වසු පැටවෙකු ඇදහීමට ගැනීමෙන් නුඹලාටම වරද කර ගත්තෙහුය. එහෙයින් නුඹලා නුඹලාගේ

وَاِذْ قَالَ مُوْسٰى لِقَوْمِهٖ يٰقَوْمِ اِنَّكُمْ
ظَلَمْتُمْ اَنْفُسَكُمْ بِاتِّخَاذِكُمُ الْعِجْلَ

فَتُوْبُوْا اِلٰى بَارِئِكُمْ فَاقْتُلُوْا اَنْفُسَكُمْ ؕ ذٰلِكُمْ خَيْرٌ لَّكُمْ عِنْدَ بَارِئِكُمْ ؕ فَتَابَ عَلَيْكُمْ ؕ اِنَّهٗ هُوَ التَّوَّابُ الرَّحِيْمُ ﴿٥٥﴾

උත්පාදකයා වෙත හැරෙනු. නුඹලා නුඹලාගේ (දුෂ්ට) ආශාවන් ඝාතනය කරනු. මෙය නුඹලාට නුඹලාගේ උත්පාදකයා වෙත ඉතා යහපත්යැ' යි මූසා තම ජනයාට කියූ අවස්ථාව (සිහිපත් කරනු.) පසුව ඔහු (අල්ලාහ්) නුඹලා වෙත දයාවෙන් යුතුව හැරුණේය. ඇත්තෙන්ම ඔහු (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය. පරම දයාබරය.

وَاِذْ قُلْتُمْ يٰمُوْسٰى لَنْ نُّؤْمِنَ لَكَ حَتّٰى نَرَى اللّٰهَ جَهْرَةً فَاَخَذَتْكُمُ الصّٰعِقَةُ وَاَنْتُمْ تَنْظُرُوْنَ ﴿٥٦﴾

56. තවද 'එම්බල මූසා! අපි මුහුණට මුහුණලා අල්ලාහ්ව දකින තුරු අපි ඔබ කෙරෙහි කිසිවිටෙකත් විශ්වාස නොකරන්නෙමු'යි නුඹලා කියූ අවස්ථාව (සිහිපත් කරනු.) පසුව නුඹලා බලා සිටියදීම නුඹලාව අකුණු පහරක් හසුකරගත්තේය.

ثُمَّ بَعَثْنٰكُمْ مِّنْ بَعْدِ مَوْتِكُمْ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿٥٧﴾

57. පසුව නුඹලා ස්තුතිවන්ත වනු පිණිස නුඹලාගේ මරණින් පසු අපි නුඹලා නැගිටුවීමු.

وَظَلَّلْنَا عَلَيْكُمُ الْغَمَامَ وَاَنْزَلْنَا عَلَيْكُمُ الْمَنَّ وَالسَّلْوٰى ؕ كُلُوْا مِنْ طَيِّبٰتِ مَا رَزَقْنٰكُمْ ؕ وَمَا ظَلَمُوْنَا وَلٰكِنْ كَانُوْۤا اَنْفُسَهُمْ يَظْلِمُوْنَ ﴿٥٨﴾

58. තවද අපි නුඹලාට ඉහලින් වලාකුළු සෙවණක් ලෙස සැලැස්සුවෙමු. තවද 'අපි නුඹලාට ලබා දුන් පවිත්‍ර දෑයින් අනුභව කරනු'(යි පවසමින්) නුඹලා වෙතට “මන්න” ද “සල්වා” ද පහළ කළෙමු. තවද ඔවුහු අපට වැරදි නොකළෙහුය. එහෙත් ඔවුහු ඔවුන්ටම වැරදි කර ගත්හ.

وَاِذْ قُلْنَا ادْخُلُوْا هٰذِهِ الْقَرْيَةَ فَكُلُوْا مِنْهَا حَيْثُ شِئْتُمْ رَغَدًا وَّ ادْخُلُوا الْبَابَ سُجَّدًا وَّ قُوْلُوْا حِطَّةٌ نَّغْفِرْ لَكُمْ خَطٰيٰكُمْ ؕ وَسَنَزِيْدُ الْمُحْسِنِيْنَ ﴿٥٩﴾

59. තවද “මෙම ගම්මානයට ඇතුළු වී නුඹලා කැමති තැනකින් ඉතා බහුලව, එයින් අනුභව කරනු. තවද එම දොරටුවෙන් ඉතා යටහත් පහත්ව ඇතුළුවී '(දෙවියනි!) අපගේ පව් ක්ෂමා කරනු මැනව'යි පවසනු. (එවිට) අපි නුඹලාගේ පව් ක්ෂමා කරන්නෙමු. යහවැඩ කරන්නවුන්හට අපි වැඩි ඵල ලබාදෙන්නෙමු”යි අප කියූ අවස්ථාව (සිහිපත් කරනු.)

60. සීමාව ඉක්මවූවන්, ඔවුනට පවසන ලද දේ (එයට) වෙනස් වූ වදනකට පෙරලූහ. එහෙයින් ඔවුන් අකීකරුවූ නිසා සීමාව ඉක්මවූවන් වෙතට අපි අහසින් දඬුවමක් පහළ කළෙමු.

فَبَدَّلَ الَّذِينَ ظَلَمُوا قَوْلًا غَيْرَ الَّذِي قِيلَ لَهُمْ فَأَنزَلْنَا عَلَى الَّذِينَ ظَلَمُوا رِجْزًا مِّنَ السَّمَاءِ بِمَا كَانُوا يَفْسُقُونَ ﴿٦٠﴾

61. තවද මූසා ඔහුගේ ජනතාව වෙනුවෙන් ජලය ඉල්ලා ප්‍රාර්ථනා කළ අවස්ථාව (සිහිපත් කරනු.) එවිට අපි (ඔහුට), 'ඔබගේ සැරයටියෙන් එම ගල මතට ගසනු'යි කීවෙමු. එවිට එයින් දිය උල්පත් දොළසක් පැන නැගුණේය. (එමගින්) සෑම ගෝත්‍රයම ඔවුන්ගේ පානය කරන ස්ථානය දැනගත්හ. 'අල්ලාහ් දුන් දෑයින් අනුභව කරනු, පානය කරනු. තවද අයුක්තිගරුක වෙමින් පොළොවෙහි කලබල ඇති නොකරනු.'

وَإِذِ اسْتَسْقَىٰ مُوسَىٰ لِقَوْمِهِ فَقُلْنَا اضْرِب بِّعَصَاكَ الْحَجَرَ ۖ فَانفَجَرَتْ مِنْهُ اثْنَتَا عَشْرَةَ عَيْنًا ۖ قَدْ عَلِمَ كُلُّ أُنَاسٍ مَّشْرَبَهُمْ ۖ كُلُوا وَاشْرَبُوا مِن رِّزْقِ اللَّهِ وَلَا تَعْثَوْا فِي الْأَرْضِ مُفْسِدِينَ ﴿٦١﴾

62. තවද 'එම්බල මූසා! නියතවශයෙන්ම අපි එකම (වර්ගයේ) ආහාරයකින් පමණක් සෑහීමට පත් නොවන්නෙමු. එහෙයින් පොළොව හට ගන්නා එහි පලාද, එහි තියඹරාද, එහි තිරිඟුද, එහි මුංද, එහි ළූනු යනාදියද ඔහු (අධිපතියාණන්) අපට ගෙන එනු පිණිස ඔබගේ අධිපතියාණන්ගෙන් අප උදෙසා යාච්ඤා කරනු'යි නුඹලා කී අවස්ථාව (සිහිපත් කරනු). 'නුඹලා උසස් දෑයක් වෙනුවට පහත් දෑයක් හුවමාරු කරගැනීමට කැමැති වන්නෙහුද? කිසියම් නගරයක් වෙතට යනු. එහි නුඹලා ඉල්ලන දේ නුඹලාට ඇතැ'යි ඔහු කීවේය. තවද ඔවුහු දැඩි අපහාසයටත් අසරණභාවයටත් පාත්‍ර වූහ. තවද ඔවුහු අල්ලාහ්ගේ උදහසටද ලක්වූහ. එයට හේතුව වූයේ, ඔවුන් අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කොට අසාධාරණ ලෙස වක්තෘවරුන් මරා දැමීමට සිතූ බැවිනි. එයට හේතුව වූයේ ඔවුන් අකීකරුවී කැරලි ගසමින් සීමාව ඉක්මැවූ බැවිනි.

وَإِذْ قُلْتُمْ يَا مُوسَىٰ لَن نَّصْبِرَ عَلَىٰ طَعَامٍ وَاحِدٍ فَادْعُ لَنَا رَبَّكَ يُخْرِجْ لَنَا مِمَّا تُنبِتُ الْأَرْضُ مِن بَقْلِهَا وَقِثَّائِهَا وَفُومِهَا وَعَدَسِهَا وَبَصَلِهَا ۖ قَالَ أَتَسْتَبْدِلُونَ الَّذِي هُوَ أَدْنَىٰ بِالَّذِي هُوَ خَيْرٌ ۚ اهْبِطُوا مِصْرًا فَإِنَّ لَكُم مَّا سَأَلْتُمْ ۗ وَضُرِبَتْ عَلَيْهِمُ الذِّلَّةُ وَالْمَسْكَنَةُ وَبَاءُوا بِغَضَبٍ مِّنَ اللَّهِ ۗ ذَٰلِكَ بِأَنَّهُمْ كَانُوا يَكْفُرُونَ بِآيَاتِ اللَّهِ وَيَقْتُلُونَ النَّبِيِّينَ بِغَيْرِ الْحَقِّ ۗ ذَٰلِكَ بِمَا عَصَوا وَّكَانُوا يَعْتَدُونَ ﴿٦٢﴾

63. නියතවශයෙන්ම, විශ්වාසීතයින්, යුදෙව්වන්, කිතුණුවන් සහ සාබිඊන්වරුන් (යන පිරිස් අතරින්) කිනම් හෝ අය අල්ලාහ් ගැනත්, අවසාන දිනය ගැනත් විශ්වාස කරන්නේද තවද යහපත් ක්‍රියා කරන්නේද ඔවුන්ගේ තිළිණ ඔවුන්ගේ අධිපතියාණන් ගෙන් ලැබෙනු ඇත. ඔවුන්ට කිසිඳු බියක්ද (පැමිණෙන්නේ) නැත. තවද ඔවුහු කණස්සල්ලට පත් නොවන්නෝය.

إِنَّ الَّذِينَ آمَنُوا وَالَّذِينَ هَادُوا وَالنَّصَارَىٰ وَالصَّابِئِينَ مَنْ آمَنَ بِاللَّهِ وَالْيَوْمِ الْآخِرِ وَعَمِلَ صَالِحًا فَلَهُمْ أَجْرُهُمْ عِنْدَ رَبِّهِمْ وَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُونَ ﴿٦٣﴾

64. තවද අප නුඹලාගෙන් ප්‍රතිඥාවක් ලබාගෙන නුඹලාට ඉහලින් කන්ද එසවූ අවස්ථාව (සිහිපත් කරනු.) 'අප නුඹලාට දුන් දේ දැඩිව අල්ලා ගනු. තවද නුඹලා ආරක්‍ෂාවනු පිණිස එහි ඇති දේ සිත්හි තබාගනු'(යි පැවසුවෙමු.)

وَإِذْ أَخَذْنَا مِيثَاقَكُمْ وَرَفَعْنَا فَوْقَكُمُ الطُّورَ خُذُوا مَا آتَيْنَاكُمْ بِقُوَّةٍ وَاذْكُرُوا مَا فِيهِ لَعَلَّكُمْ تَتَّقُونَ ﴿٦٤﴾

65. පසුව නුඹලා පිටුපා ගියෙහුය. තවද නුඹලා කෙරෙහි වූ අල්ලාහ්ගේ වරප්‍රසාදයත්, ඔහුගේ දයාලුභාවයත් නොවන්නට, ඇත්තෙන්ම නුඹලා පාඩු විඳින්නන් අතර වන්නෙහුය.

ثُمَّ تَوَلَّيْتُمْ مِنْ بَعْدِ ذَٰلِكَ فَلَوْلَا فَضْلُ اللَّهِ عَلَيْكُمْ وَرَحْمَتُهُ لَكُنْتُمْ مِنَ الْخَاسِرِينَ ﴿٦٥﴾

66. තවද ඇත්තෙන්ම නුඹලා අතරින් සබත් විෂයයෙහි සීමාව ඉක්මවූ අයගේ (අවසානය) කෙසේ වූයේ දැයි නුඹලා දන්නෙහුය. එබැවින් අපි ඔවුනට, 'නුඹලා නිවට රිළව් වෙනු'යි කීවෙමු.

وَلَقَدْ عَلِمْتُمُ الَّذِينَ اعْتَدَوْا مِنْكُمْ فِي السَّبْتِ فَقُلْنَا لَهُمْ كُونُوا قِرَدَةً خَاسِئِينَ ﴿٦٦﴾

67. මෙයාකාරයට අපි මෙය එකල සිටියවුන්ටද, පසුව පැමිණෙනවුන්ටද ආදර්ශයක් ලෙසද, දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන්ට පාඩමක් ලෙසද කළෙමු.

فَجَعَلْنَاهَا نَكَالًا لِمَا بَيْنَ يَدَيْهَا وَمَا خَلْفَهَا وَمَوْعِظَةً لِلْمُتَّقِينَ ﴿٦٧﴾

68. තවද මූසා ඔහුගේ ජනතාවට, 'අල්ලාහ් නුඹලාට ගවයකු මැරීමට අණ කරන්නේයැ'යි පැවසූ අවස්ථාව (සිහිපත් කරනු), ඔවුහු 'ඔබ අප හට සරදම් කරන්නෙහිදැ?'යි කීහ. 'මම අඥානයින්ගෙන් කෙනෙකු නොවනු පිණිස අල්ලාහ්ගෙන් පිහිට

وَإِذْ قَالَ مُوسَىٰ لِقَوْمِهِ إِنَّ اللَّهَ يَأْمُرُكُمْ أَنْ تَذْبَحُوا بَقَرَةً قَالُوا أَتَتَّخِذُنَا هُزُوًا قَالَ أَعُوذُ بِاللَّهِ أَنْ أَكُونَ مِنَ

ඉතාම්'යි ඔහු කීවේය.

الْجٰهِلِيْنَ ۝٦٨

69. 'එය කෙසේ එකෙක් දැයි ඔහු (අධිපතියාණන්) අපට පහදා දෙනු පිණිස ඔබගේ අධිපතියාණන්ගෙන් අප උදෙසා අයදින්නැ'යි ඔවුහු කීහ. 'එය මහළුද නොවන, පැටියකුද නොවන, ඒ දෙක අතර වූ සම්පූර්ණයෙන් වැඩුන ගවයකු යැයි (අධිපතියාණන්) පවසන්නේය. එහෙයින් නුඹලාට අණකරන ලද දේ ඉටු කරනු'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالُوا ادْعُ لَنَا رَبَّكَ يُبَيِّنْ لَّنَا مَا هِيَ ۭ قَالَ اِنَّهٗ يَقُوْلُ اِنَّهَا بَقَرَةٌ لَّا فَارِضٌ وَّلَا بِكْرٌ ۭ عَوَانٌۢ بَيْنَ ذٰلِكَ ۭ فَافْعَلُوْا مَا تُؤْمَرُوْنَ ۝٦٩

70. 'එය කෙබඳු වර්ණ ඇත්තේ දැයි ඔහු (අධිපතියාණන්) අප හට පහදා දෙනු පිණිස ඔබගේ අධිපතියාණන්ගෙන් අප උදෙසා අයදින්නැ'යි ඔවුහු කීහ. 'එය දුඹුරු වර්ණ ගවයෙකි. එයගේ ඔපය පිරිසිදුවූ පිරුණාවූ (තද) එකකි. දකින්නන් ප්‍රමෝදයට පත්කරන්නක් බවද (අධිපතියාණන්) පවසන්නේයැ'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالُوا ادْعُ لَنَا رَبَّكَ يُبَيِّنْ لَّنَا مَا لَوْنُهَا ۭ قَالَ اِنَّهٗ يَقُوْلُ اِنَّهَا بَقَرَةٌ صَفْرَاۗءُ ۙ فَاقِعٌ لَّوْنُهَا تَسُرُّ النّٰظِرِيْنَ ۝٧٠

71. 'එය කුමක් වැනි දැයි ඔහු (අධිපතියාණන්) අප හට පහදා දෙනු පිණිස ඔබගේ අධිපතියාණන්ගෙන් අප උදෙසා අයදින්න, මන්ද (මෙවැනි සැම) ගවයකුම අපට එකසේ පෙනෙන්නේය. තවද අල්ලාහ් කැමති වන්නේ නම්, ඇත්තෙන්ම අපි යහමග පෙන්වනු ලබන්නෙමු'යි ඔවුහු කීහ.

قَالُوا ادْعُ لَنَا رَبَّكَ يُبَيِّنْ لَّنَا مَا هِيَ ۙ اِنَّ الْبَقَرَ تَشٰبَهَ عَلَيْنَا ۭ وَاِنَّآ اِنْ شَاۗءَ اللّٰهُ لَمُهْتَدُوْنَ ۝٧١

72. 'එය වියකර තැබීමටද, බිම සීසෑමටද, ගොයමට දිය ලෑමටද, නොයෙදූ නොකැළැල් එකම වර්ණයකින් යුත් ගවයකු බව (දෙවියන්) පවසන්නේයැ'යි ඔහු පිළිතුරු දුන්නේය. 'ඔබ සත්‍ය තොරතුර දැක්වූයේ මේ දැන් යැ'යි ඔවුහු කීහ. ඔවුහු එවැන්නක් කිරීමට නොවූවද, ඔවුහු එය මරා දැමූහ.

قَالَ اِنَّهٗ يَقُوْلُ اِنَّهَا بَقَرَةٌ لَّا ذَلُوْلٌ تُثِيْرُ الْاَرْضَ وَلَا تَسْقِي الْحَرْثَ ۚ مُسَلَّمَةٌ لَّا شِيَةَ فِيْهَا ۭ قَالُوا الْـٰٔنَ جِئْتَ بِالْحَقِّ ۭ فَذَبَحُوْهَا وَمَا كَادُوْا يَفْعَلُوْنَ ۝٧٢

73. තවද නුඹලා එක් තැනැත්තෙකු මරා දැමූ පසු ඒ පිළිබඳව නුඹලා භේද වූ කල්හි (එම අවස්ථාව සිහිපත් කරනු). එහෙත් නුඹලා සැඟවූ දේ අල්ලාහ් එළි කරන්නේය.

وَإِذْ قَتَلْتُمْ نَفْسًا فَادّٰرَءْتُمْ فِيهَا ۖ وَاللّٰهُ
مُخْرِجٌ مَّا كُنْتُمْ تَكْتُمُونَ ﴿٧٣﴾

74. එබැවින් අපි 'මෙය (මෙම සිදුවීම සොයාගනු පිණිස) මේ හා සමාන තවත් සිදුවීම් සමග සසඳා බලනු'යි කීවෙමු. මෙලෙස අල්ලාහ් මළවුන්ට ජීවය දෙන්නේය. තවද නුඹලා වටහා ගනු පිණිස නුඹලාට ඔහුගේ සළකුණු පෙන්වන්නේය.

فَقُلْنَا اضْرِبُوهُ بِبَعْضِهَا ۚ كَذٰلِكَ يُحْيِ اللّٰهُ
الْمَوْتٰى ۙ وَيُرِيكُمْ اٰيٰتِهٖ لَعَلَّكُمْ
تَعْقِلُونَ ﴿٧٤﴾

75. පසුව නුඹලාගේ හදවත් දැඩි විය. ඉන්පසුව ගල් මෙන් හෝ ඊටත් වඩා දැඩි බවට පත්විය. ඇත්තෙන්ම සමහර ගල්පර වෙති. එයින් ගංගා ගලා බසිති. තවත් සමහර ඒවා දෑබැවී එයින් ජලධාරා වහනය වෙයි. තවද සත්තකින්ම ඒ (හදවත්) අතුරින් සමහරක් අල්ලාහ්ට බියෙන් නිහතමානි වෙති. තවද නුඹලා කරන දේ පිළිබඳව අල්ලාහ් නොසැලකිලිමත් නොවේ.

ثُمَّ قَسَتْ قُلُوبُكُمْ مِّنْۢ بَعْدِ ذٰلِكَ فَهِيَ
كَالْحِجَارَةِ أَوْ أَشَدُّ قَسْوَةً ۚ وَإِنَّ مِنَ
الْحِجَارَةِ لَمَا يَتَفَجَّرُ مِنْهُ الْأَنْهٰرُ ۚ وَإِنَّ
مِنْهَا لَمَا يَشَّقَّقُ فَيَخْرُجُ مِنْهُ الْمَآءُ ۚ وَإِنَّ
مِنْهَا لَمَا يَهْبِطُ مِنْ خَشْيَةِ اللّٰهِ ۗ وَمَا اللّٰهُ
بِغٰفِلٍ عَمَّا تَعْمَلُونَ ﴿٧٥﴾

76. අල්ලාහ්ගේ වචනයට සවන්දී, එය අවබෝධ වූවායින් පසු ඔවුන් එය මැනෙවින් දැනගෙන, එය (ඕනෑකමින්) විකෘති කරන්නාවූ පිරිසක් ඔවුනතරෙහි සිටියදී, ඔවුහු නුඹලා කෙරෙහි විශ්වාස කරති යැයි, නුඹලා බලාපොරොත්තු ඇති කරගන්නේද?

أَفَتَطْمَعُونَ أَنْ يُّؤْمِنُوا لَكُمْ وَقَدْ كَانَ
فَرِيقٌ مِّنْهُمْ يَسْمَعُونَ كَلٰمَ اللّٰهِ ثُمَّ
يُحَرِّفُونَهٗ مِنْۢ بَعْدِ مَا عَقَلُوهُ وَهُمْ
يَعْلَمُونَ ﴿٧٦﴾

77. තවද ඔවුහු විශ්වාස කරන අය හමුවන විටදී 'අපි විශ්වාස කරන්නෙමු'යි කියති. තවද ඔවුන් එකිනෙකා හුදකලාවෙහි හමුවන විටදී, 'අල්ලාහ් නුඹලාට අනාවරණය

وَإِذَا لَقُوا الَّذِينَ اٰمَنُوا قَالُوٓا اٰمَنَّا ۚ
وَإِذَا خَلَا بَعْضُهُمْ إِلٰى بَعْضٍ قَالُوٓا

කළ දෙයින් ඔවුන් නුඹලාගේ අධිපතියාණන් ඉදිරියෙහි ඒ ගැන නුඹලා සමඟ තර්ක කිරීම පිණිස නුඹලා ඒවා ඔවුනට දන්වන්නෙහුද? එබැවින් නුඹලා තේරුම් නොගන්නෙහුදැ?'යි කියති.

أَتُحَدِّثُونَهُم بِمَا فَتَحَ اللَّهُ عَلَيْكُمْ لِيُحَاجُّوكُم بِهِ عِندَ رَبِّكُمْ ۚ أَفَلَا تَعْقِلُونَ ﴿٧٧﴾

78. ඔවුන් සඟවන දෙයද, ඔවුන් එළි කරන දෙයද අල්ලාහ් දන්නේ යැයි ඔවුහු නොදනිත්ද?

أَوَلَا يَعْلَمُونَ أَنَّ اللَّهَ يَعْلَمُ مَا يُسِرُّونَ وَمَا يُعْلِنُونَ ﴿٧٨﴾

79. තවද ඔවුන්ගෙන් සමහරෙක් නූගත්ය. (ඔවුන්ගේම) මිථ්‍යා මත හැරෙන්නට පුස්තකයෙහි ඔවුන්ට කිසිම දැනුමක් නොමැත. තවද ඔවුන් අනුමාන කරනු හැරෙන්නට (අන් කිසිවක් නොකරන්නෝ)ය.

وَمِنْهُمْ أُمِّيُّونَ لَا يَعْلَمُونَ الْكِتَابَ إِلَّا أَمَانِيَّ وَإِنْ هُمْ إِلَّا يَظُنُّونَ ﴿٧٩﴾

80. එබැවින් තමන්ගේම අතින් පුස්තකය ලියා, ඒ සඳහා අල්ප මිලක් ලබාගැනීම පිණිස 'මෙය අල්ලාහ් ගෙන්' යැයි කියන ඔවුනට විනාශය වේ. තවද ඔවුන්ගේ අතින් ලියූ බැවින්ද ඔවුනට විනාශය වේ. තවද ඔවුන් උපයාගත් දේ සඳහාද ඔවුනට විනාශය වේ.

فَوَيْلٌ لِّلَّذِينَ يَكْتُبُونَ الْكِتَابَ بِأَيْدِيهِمْ ثُمَّ يَقُولُونَ هَٰذَا مِنْ عِندِ اللَّهِ لِيَشْتَرُوا بِهِ ثَمَنًا قَلِيلًا ۖ فَوَيْلٌ لَّهُم مِّمَّا كَتَبَتْ أَيْدِيهِمْ وَوَيْلٌ لَّهُم مِّمَّا يَكْسِبُونَ ﴿٨٠﴾

81. තවද '(සුළු) දින ගණනක් හැරෙන්නට ගින්න අපව වෙලා නොගන්නේමයැ'යි ඔවුහු කියති. පවසන්න. 'නුඹලා අල්ලාහ්ගෙන් කිසියම් පොරොන්දුවක් ගත්තේද? එසේ නම් අල්ලාහ් කිසිවිටෙකත් ඔහුගේ පොරොන්දුව කඩ නොකරන්නේමය. නොඑසේනම් නුඹලා අල්ලාහ් ගැන නොදන්නා දෙයක් පවසන්නේද?'

وَقَالُوا لَن تَمَسَّنَا النَّارُ إِلَّا أَيَّامًا مَّعْدُودَةً ۚ قُلْ أَتَّخَذْتُمْ عِندَ اللَّهِ عَهْدًا فَلَن يُخْلِفَ اللَّهُ عَهْدَهُ ۖ أَمْ تَقُولُونَ عَلَى اللَّهِ مَا لَا تَعْلَمُونَ ﴿٨١﴾

82. සඳහටම යමෙක් දුෂ්ඨ ක්‍රියා කරමින් සහ ඔහුගේ පාපයන් ඔහුව වටලාගෙන ඇත්නම්, නිරාගින්නෙහි වැසියන් ඔවුහුම වෙති. ඔවුහු එහිම

بَلَىٰ مَن كَسَبَ سَيِّئَةً وَأَحَاطَتْ بِهِ خَطِيئَتُهُ فَأُولَٰئِكَ أَصْحَابُ النَّارِ ۖ هُمْ

فِيهَا خَٰلِدُونَ ﴿٨٢﴾

වෙසෙති.

وَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّٰلِحَٰتِ أُولَٰٓئِكَ أَصْحَٰبُ الْجَنَّةِ ۖ هُمْ فِيهَا خَٰلِدُونَ ﴿٨٣﴾

83. එහෙත් විශ්වාස කරමින් යහපත් ක්‍රියාකරන අය වන ඔවුහු ස්වර්ගයෙහි වැසියන් වෙති. ඔවුහු එහිම වෙසෙන්නෝය.

وَإِذْ أَخَذْنَا مِيثَٰقَ بَنِيٓ إِسْرَٰٓءِيلَ لَا تَعْبُدُونَ إِلَّا اللَّهَ وَبِالْوَٰلِدَيْنِ إِحْسَانًا وَذِي الْقُرْبَىٰ وَالْيَتَٰمَىٰ وَالْمَسَٰكِينِ وَقُولُوا لِلنَّاسِ حُسْنًا وَأَقِيمُوا الصَّلَوٰةَ وَآتُوا الزَّكَوٰةَ ثُمَّ تَوَلَّيْتُمْ إِلَّا قَلِيلًا مِّنكُمْ وَأَنتُم مُّعْرِضُونَ ﴿٨٤﴾

84. තවද 'නුඹලා අල්ලාහ් හැර (අන් කිසිවෙකු) නොනමදිනු. තවද දෙමව්පියන්ටද නෑදෑයින්ටද අනාථයින්ටද දිළිඳුන්ටද කරුණාව (දක්වනු.) තවද මිනිසුන්හට කාරුණිකව කථා කරනු. තවද නමස්කාරයෙහි නිරතවනු. තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු'යි ඉස්රාඊලයේ දරුවන්ගෙන් අපි ප්‍රතිඥාවක් ලබාගත් අවස්ථාව (සිහිපත් කරනු.) ඉන්පසු නුඹලා ගෙන් ස්වල්ප දෙනෙකු හැරෙන්නට නුඹලා ප්‍රතික්ෂේප කර ඉවත හැරුණෙහුය.

وَإِذْ أَخَذْنَا مِيثَٰقَكُمْ لَا تَسْفِكُونَ دِمَآءَكُمْ وَلَا تُخْرِجُونَ أَنفُسَكُم مِّن دِيَٰرِكُمْ ثُمَّ أَقْرَرْتُمْ وَأَنتُمْ تَشْهَدُونَ ﴿٨٥﴾

85. තවද 'නුඹලා නුඹලාගේ ලේ නොසොලවනු, නුඹලාගේ අය නුඹලාගේ නිවැස්වලින් පිටමං නොකරනු.'යි අප නුඹලාගෙන් ප්‍රතිඥාවක් ලබාගත් අවස්ථාව (සිහිපත් කරනු.) එවිට නුඹලා (එය) තහවුරු කළෙහුය. තවද නුඹලා (එයට) සාක්ෂි දැරුවෙහුය.

ثُمَّ أَنتُمْ هَٰٓؤُلَآءِ تَقْتُلُونَ أَنفُسَكُمْ وَتُخْرِجُونَ فَرِيقًا مِّنكُم مِّن دِيَٰرِهِمْ تَظَٰهَرُونَ عَلَيْهِم بِالْإِثْمِ وَالْعُدْوَٰنِ وَإِن يَأْتُوكُمْ أُسَٰرَىٰ تُفْدُوهُمْ وَهُوَ مُحَرَّمٌ عَلَيْكُمْ إِخْرَاجُهُمْ ۚ أَفَتُؤْمِنُونَ بِبَعْضِ الْكِتَٰبِ

86. එසේ වුවද නුඹලා නුඹලාගේම සහෝදරයින් ඝාතනය කරන ජනතාවකි. තවද නුඹලාගේ ජනතාවගෙන් එක් කොටසක්ව නුඹලා ඔවුන්ගේ නිවෙස් වලින් පිටුවහල් කරන්නෙහුය. පවෙන්ද, සීමාව ඉක්මවීමෙන්ද ඔවුන්ට විරුද්ධව නුඹලා එකිනෙකාට උදව් දෙන්නෙහුය. ඔවුන්ව පිටුවහල් කිරීම නුඹලාට නිත්‍යානුකුල නොවුවද, ඔවුන් නුඹලා වෙත සිරකරුවන් ලෙස පැමිණියහොත්, නුඹලා ඔවුන්ගෙන් වන්දියක් ලබා ඔවුන්ව මුදාහරින්නෙහුය. එසේනම් නුඹලා

وَتَكْفُرُوْنَ بِبَعْضٍ ۚ فَمَا جَزَآءُ مَنْ
يَّفْعَلُ ذٰلِكَ مِنْكُمْ اِلَّا خِزْيٌ فِي الْحَيٰوةِ
الدُّنْيَا ۚ وَيَوْمَ الْقِيٰمَةِ يُرَدُّوْنَ اِلٰٓى اَشَدِّ
الْعَذَابِ ؕ وَمَا اللّٰهُ بِغَافِلٍ عَمَّا تَعْمَلُوْنَ ﴿٨٦﴾

පුස්තකයෙහි කොටසක් විශ්වාස කර, කොටසක් අවිශ්වාස කරන්නෙහුද? එබැවින් නුඹලාගෙන් මෙසේ කරනවුන් හට අවමානය හැර මෙලොව ජිවිතයෙහිදී අන් ප්‍රතිඵලයක් නොමැත. තවද විනිශ්චය දිනයෙහිදී ඔවුහු තදබල දඬුවමක් වෙත හරවනු ලබන්නෙහුය. නිශ්චිතවම නුඹලා කරන දේ ගැන අල්ලාහ් නොසැලකිලිමත් නොවේ.

اُولٰٓئِكَ الَّذِيْنَ اشْتَرَوُا الْحَيٰوةَ
الدُّنْيَا بِالْاٰخِرَةِ ۫ فَلَا يُخَفَّفُ عَنْهُمُ
الْعَذَابُ وَلَا هُمْ يُنْصَرُوْنَ ﴿٨٧﴾ ع

87. පරලොවට වඩා මෙලොව ජිවිතය ප්‍රිය කළ අය මොවුහුමය. එබැවින් මොවුන්ගේ දඬුවම ලිහිල් කරනු නොලැබේ. තවද මොවුහු (අන් කිසිඳු ආකාරයකින්) උදව් නොකරනු ලබන්නෝය.

وَلَقَدْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ وَقَفَّيْنَا مِنْۢ
بَعْدِهٖ بِالرُّسُلِ ۫ وَاٰتَيْنَا عِيْسَى ابْنَ مَرْيَمَ
الْبَيِّنٰتِ وَاَيَّدْنٰهُ بِرُوْحِ الْقُدُسِ ؕ اَفَكُلَّمَا
جَآءَكُمْ رَسُوْلٌۢ بِمَا لَا تَهْوٰٓى اَنْفُسُكُمُ
اسْتَكْبَرْتُمْ ۚ فَفَرِيْقًا كَذَّبْتُمْ ۫ وَفَرِيْقًا
تَقْتُلُوْنَ ﴿٨٨﴾

88. තවද සැබැවින්ම අපි මූසාට පුස්තකය දුනිමු. තවද ඔහුගෙන් පසු අපි දූතයින්ව ඔහුගේ අඩිපාරෙහි අනුගමනය කිරීමට සැලැස්සුවෙමු. තවද මර්යම්ගේ පුත් ඊසාට අපි ප්‍රත්‍යක්‍ෂ සලකුණු දී ශුද්ධවූ ආත්මයෙන් ඔහු ශක්තිමත් කළෙමු. එසේ නම් නුඹලා අකැමති දෙයක් රැගෙන දූතයෙකු නුඹලා වෙත පැමිණෙන සෑමවිටම නුඹලා උඩඟු ලෙස හැසිරෙමින් සමහරෙකුව මුසාවාදීන් සේ සළකා අන් අයව මරාදමන්නෙහුද?

وَقَالُوْا قُلُوْبُنَا غُلْفٌ ؕ بَلْ لَّعَنَهُمُ اللّٰهُ
بِكُفْرِهِمْ فَقَلِيْلًا مَّا يُؤْمِنُوْنَ ﴿٨٩﴾

89. 'අපගෙ' හදවත' ආවරණයකින් වැසී ඇත'යි ඔවුහු කීහ. නොඑසේය. අල්ලාහ් ඔවුන්ගේ අවිශ්වාසිතභාවය හේතුවෙන් ඔවුන්ට ශාප කර ඇත්තේය. ඔවුන් විශ්වාස කරන්නේ අල්ප මාත්‍රයකි.

وَلَمَّا جَآءَهُمْ كِتٰبٌ مِّنْ عِنْدِ اللّٰهِ
مُصَدِّقٌ لِّمَا مَعَهُمْ ۙ وَكَانُوْا مِنْ قَبْلُ
يَسْتَفْتِحُوْنَ عَلَى الَّذِيْنَ كَفَرُوْا ۚ فَلَمَّا

90. තවද ඔවුන් වෙත ඇති දේ සම්පූර්ණ කරන්නාවූ ග්‍රන්ථයක් අල්ලාහ්ගෙන් ඔවුන් වෙත පැමිණි කල්හි, මීට පෙර ද ඔවුන් අවිශ්වාසිතයින්ට එරෙහිව ජයග්‍රහණය යදිමින් සිටිය නමුත්,

ඔවුන් දැන සිටියා වූ දේ ඔවුන් වෙත පැමිණි කල්හි, ඔවුහු එය ප්‍රතික්ෂේප කළහ. අවිශ්වාසීතයින් මත අල්ලාහ්ගේ ශාපය වේ.

جَآءَهُمۡ مَّا عَرَفُوۡا كَفَرُوۡا بِهٖ فَلَعۡنَةُ اللّٰهِ عَلَى الۡكٰفِرِيۡنَ ﴿٩٠﴾

91. ඔවුන් තමන්ගේ ආත්මයන් විකුණා ලත් දේ නපුරකි. එනම් අල්ලාහ් ඔහුගේ දාසයන් අතුරින් ඔහු කැමැති කෙනෙකු වෙත ඔහුගේ වරප්‍රසාදයන් පහළ කළ හේතුවෙන්, අල්ලාහ් අනාවරණය කර ඇති දේ මත ක්‍රෝධයෙන්, ඔවුහු විශ්වාස නොකළහ. එහෙයින් ඔවුහු උදහසෙන් උදහසට ලක්වූහ. තවද අවිශ්වාසිතයින් හට නින්දා සහගත දඬුවමක් ඇත.

بِئۡسَمَا اشۡتَرَوۡا بِهٖۤ اَنۡفُسَهُمۡ اَنۡ يَّكۡفُرُوۡا بِمَآ اَنۡزَلَ اللّٰهُ بَغۡيًا اَنۡ يُّنَزِّلَ اللّٰهُ مِنۡ فَضۡلِهٖ عَلٰى مَنۡ يَّشَآءُ مِنۡ عِبَادِهٖ ۚ فَبَآءُوۡ بِغَضَبٍ عَلٰى غَضَبٍ ؕ وَلِلۡكٰفِرِيۡنَ عَذَابٌ مُّهِيۡنٌ ﴿٩١﴾

92. තවද 'අල්ලාහ් පහළ කළ දේ කෙරෙහි විශ්වාස කරනු'යි ඔවුනට පවසනු ලැබූ කල්හි, ඔවුහු 'අප වෙත පහළ කළ දේ මත අපි විශ්වාස කරන්නෙමු'යි කියති. තවද එයට පසු (පහළ කළ) දේ මත ඔවුහු විශ්වාස නොකරති. එසේ වුවත් එය ඔවුන් වෙත ඇති දේ සනාථ කරන්නාවූ සත්‍යයකි. 'නුඹලා විශ්වාසිතයින් වූයේ නම් මීට පෙර අල්ලාහ්ගේ වක්තෘවරුන් මරා දැමීමට උත්සාහ කළේ කුමක් නිසාදැ?'යි (ඔවුනට) පවසන්න.

وَاِذَا قِيۡلَ لَهُمۡ اٰمِنُوۡا بِمَآ اَنۡزَلَ اللّٰهُ قَالُوۡا نُؤۡمِنُ بِمَآ اُنۡزِلَ عَلَيۡنَا وَيَكۡفُرُوۡنَ بِمَا وَرَآءَهٗ ۚ وَهُوَ الۡحَـقُّ مُصَدِّقًا لِّمَا مَعَهُمۡ ؕ قُلۡ فَلِمَ تَقۡتُلُوۡنَ اَنۡۢبِيَآءَ اللّٰهِ مِنۡ قَبۡلُ اِنۡ كُنۡتُمۡ مُّؤۡمِنِيۡنَ ﴿٩٢﴾

93. තවද මූසා ප්‍රත්‍යක්ෂ සළකුණු සමග නුඹලා වෙත පැමිණියේය. පසුව ඔහු නැති විටකදී නුඹලා වසු පැටවෙකු (ඇදහීමට) ගෙන නුඹලා සීමාව ඉක්මවන්නන් වූහ.

وَلَقَدۡ جَآءَكُمۡ مُّوۡسٰى بِالۡبَيِّنٰتِ ثُمَّ اتَّخَذۡتُمُ الۡعِجۡلَ مِنۡۢ بَعۡدِهٖ وَاَنۡتُمۡ ظٰلِمُوۡنَ ﴿٩٣﴾

94. තවද 'අපි නුඹලාට දුන් දේ දැඩිව අල්ලා ගනු. තවද අසනු'යි (පවසමින්) අප නුඹලාගෙන් ගිවිසුමක් ගෙන, කන්ද නුඹලාට ඉහලින් එසවූ (අවස්ථාව සිහිපත් කරනු.) 'අපි සවන් දෙන්නෙමු. තවද අපි අකීකරු

وَاِذۡ اَخَذۡنَا مِيۡثَاقَكُمۡ وَرَفَعۡنَا فَوۡقَكُمُ الطُّوۡرَ ؕ خُذُوۡا مَآ اٰتَيۡنٰكُمۡ بِقُوَّةٍ وَّاسۡمَعُوۡا ؕ قَالُوۡا سَمِعۡنَا وَعَصَيۡنَا ۚ

وَأُشْرِبُوا فِي قُلُوبِهِمُ الْعِجْلَ بِكُفْرِهِمْ ۚ قُلْ بِئْسَمَا يَأْمُرُكُمْ بِهِ إِيمَانُكُمْ إِنْ كُنْتُمْ مُؤْمِنِينَ ٩٤

වන්නෙමු'යි ඔවුහු කීහ. තවද ඔවුන්ගේ අවිශ්වාසිතභාවය හේතුවෙන් වසු පැටවා (මතවූ ඇල්ම) ඔවුන්ගේ සිත් තුළ කාවැදුනේය. 'නුඹලා විශ්වාසිතයින් නම්, නුඹලාගේ විශ්වාසය නුඹලාට අණ කරන දේ ඉතා නපුරුයැ'යි (ඔවුනට) පවසන්න.

قُلْ إِنْ كَانَتْ لَكُمُ الدَّارُ الْآخِرَةُ عِنْدَ اللَّهِ خَالِصَةً مِنْ دُونِ النَّاسِ فَتَمَنَّوُا الْمَوْتَ إِنْ كُنْتُمْ صَادِقِينَ ٩٥

95. 'අල්ලාහ් සතුව ඇති එලොව වාසස්ථානය අන් (සියළු) ජනතාව හැර නුඹලා සඳහාම පමණක් වේ නම්, නුඹලා සත්‍යවාදීන් නම්, මරණය පතනු' යි පවසන්න.

وَلَنْ يَتَمَنَّوْهُ أَبَدًا بِمَا قَدَّمَتْ أَيْدِيهِمْ ۗ وَاللَّهُ عَلِيمٌ بِالظَّالِمِينَ ٩٦

96. එහෙත් ඔවුන්ගේම අත් (වලින්) පෙර එවූ (කළ) දේ හේතු කොට ගෙන ඔවුහු එය කිසිසේත් නොපතන්නෙහුය. තවද වරද කරුවන් ගැන අල්ලාහ් මැනවින් දන්නේය.

وَلَتَجِدَنَّهُمْ أَحْرَصَ النَّاسِ عَلَىٰ حَيَاةٍ وَمِنَ الَّذِينَ أَشْرَكُوا ۚ يَوَدُّ أَحَدُهُمْ لَوْ يُعَمَّرُ أَلْفَ سَنَةٍ وَمَا هُوَ بِمُزَحْزِحِهِ مِنَ الْعَذَابِ أَنْ يُعَمَّرَ ۗ وَاللَّهُ بَصِيرٌ بِمَا يَعْمَلُونَ ٩٧

معانقة عند المتأخرين

97. තවද නියතවශයෙන්ම අන් සියලු මිනිසුන්ට (වඩා), එමෙන්ම (දෙවියන්ට) අන් දේවල් සම කරන අයටද (වඩා) ජීවත්වීමට ගිජු කමක් දක්වන්නන් ඔවුන් බව ඔබ දකින්නෙහිය. ඔවුන්ගෙන් සෑම කෙනෙකුම ඔහුට වසර දාහක ආයුෂ ලැබීමට කැමති වෙයි. එහෙත් ඔහුට (එවැනි) ආයුෂ ප්‍රදානය කළා වුවද, එය ඔහුව දඬුවමින් ආරක්ෂා නොකරන්නේය. තවද ඔවුන් කරන සියල්ලක්ම අල්ලාහ් දකින්නේය.

قُلْ مَنْ كَانَ عَدُوًّا لِجِبْرِيلَ فَإِنَّهُ نَزَّلَهُ عَلَىٰ قَلْبِكَ بِإِذْنِ اللَّهِ مُصَدِّقًا لِمَا بَيْنَ يَدَيْهِ وَهُدًى وَبُشْرَىٰ لِلْمُؤْمِنِينَ ٩٨

98. පවසන්න! 'මීට පෙර ඇති දේ සනාථ කරන්නාවූද, විශ්වාසිතයින්ට මඟ පෙන්වීමක් හා ශුභාරංචියක් වන්නාවූද මෙය අල්ලාහ්ගේ අණ පරිදි ඔබගේ හද මතට පහළ කිරීමට සැලැස්වූ ජිබ්රීල්ට කවුරුන් හෝ සතුරෙකු වන්නේද?'.

مَنْ كَانَ عَدُوًّا لِلَّهِ وَمَلَائِكَتِهِ وَرُسُلِهِ وَجِبْرِيلَ وَمِيكَالَ فَإِنَّ اللَّهَ عَدُوٌّ

99. 'කවුරුන් හෝ අල්ලාහ්ටද, ඔහුගේ සුරදූතයින්ටද, ඔහුගේ දූතයින්ටද, ජිබ්රීල්ට හා මීකායිල්ටද සතුරෙකු වන්නේද, එවිට නියතවශයෙන්ම (එවන්)

لِلْكٰفِرِيْنَ ۝٩٩

අවිශ්වාසිතයින්ට අල්ලාහ්ද සතුරෙකි.'

وَلَقَدْ اَنْزَلْنَآ اِلَيْكَ اٰيٰتٍۢ بَيِّنٰتٍ ۚ وَمَا يَكْفُرُ بِهَآ اِلَّا الْفٰسِقُوْنَ ۝١٠٠

100. තවද නියතවශයෙන්ම, අපි ඔබ හට පැහැදිලි සළකුණු පහළ කළෙමු. තවද අවනත නොවන්නන් හැර අන් කිසිවෙක් ඒවා අවිශ්වාස නොකරයි.

اَوَكُلَّمَا عٰهَدُوْا عَهْدًا نَّبَذَهٗ فَرِيْقٌ مِّنْهُمْ ۭ بَلْ اَكْثَرُهُمْ لَا يُؤْمِنُوْنَ ۝١٠١

101. කිම! ඔවුන් ප්‍රතිඥාවක් දෙන සෑමවිටම ඔවුන්ගෙන් පිරිසක් එය ඉවතට විසි කළේ නොවේද? එපමණක්ද නොව, ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් විශ්වාස නොතබන්නෝය.

وَلَمَّا جَاۗءَهُمْ رَسُوْلٌ مِّنْ عِنْدِ اللّٰهِ مُصَدِّقٌ لِّمَا مَعَهُمْ نَبَذَ فَرِيْقٌ مِّنَ الَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ ڎ كِتٰبَ اللّٰهِ وَرَاۗءَ ظُهُوْرِهِمْ كَاَنَّهُمْ لَا يَعْلَمُوْنَ ۝١٠٢

102. තවද (දැන්) ඔවුන් වෙත ඇති දේ සනාථ කරන්නාවූ දූතයෙකු අල්ලාහ්ගෙන් ඔවුන් වෙතට පැමිණි කල්හි, පුස්තකය දෙන ලද අයගෙන් පිරිසක් අල්ලාහ්ගේ පුස්තකය ඔවුන් (එය) නොදන්නා සේ ඔවුන්ගේ පිටුපසට විසි කළහ.

وَاتَّبَعُوْا مَا تَتْلُوا الشَّيٰطِيْنُ عَلٰي مُلْكِ سُلَيْمٰنَ ۚ وَمَا كَفَرَ سُلَيْمٰنُ وَلٰكِنَّ الشَّيٰطِيْنَ كَفَرُوْا يُعَلِّمُوْنَ النَّاسَ السِّحْرَ ۤ وَمَآ اُنْزِلَ عَلَي الْمَلَكَيْنِ بِبَابِلَ هَارُوْتَ وَمَارُوْتَ ۭ وَمَا يُعَلِّمٰنِ مِنْ اَحَدٍ حَتّٰى يَقُوْلَآ اِنَّمَا نَحْنُ فِتْنَةٌ فَلَا تَكْفُرْ ۭ فَيَتَعَلَّمُوْنَ مِنْهُمَا مَا يُفَرِّقُوْنَ بِهٖ بَيْنَ الْمَرْءِ وَزَوْجِهٖ ۭ وَمَا هُمْ بِضَاۗرِّيْنَ بِهٖ مِنْ اَحَدٍ اِلَّا بِاِذْنِ اللّٰهِ ۭ

103. තවද ඔවුහු සුලෙයිමාන්ගේ රාජ්‍ය සමයේදී කැරැලිකාර (මිනිසුන්) අනුගමනය (කළ මග) පිළිපදින්නෝය. නමුත් සුලෙයිමාන් අවිශ්වාස නොකළේය. එහෙත් මිනිසුන්ට මිථ්‍යාව හා මායාව උගන්වමින් අවිශ්වාස කළේ කැරලිකරුවෝය. තවද බැබිලෝනියාවේ, හාරූත් සහ මාරූත් යන දේවදූතයින් දෙදෙනාට පහළ කරනු ලැබූ දේ (ඔවුන් පිළිපදින්නෝය.) එහෙත් ඒ දෙදෙනා 'අපි පරීක්ෂණයක් වන්නෙමු, එබැවින් අවිශ්වාස නොකරනු'යි කියනතාක් කිසිවෙකුටත් කිසිවක් ඉගැන්වූයේ නැත. එහෙයින් මිනිසුන් ඔවුන් දෙදෙනාගෙන් මිනිසාත් ඔහුගේ බිරිඳත් අතර භේදය ඇතිකළ දේ ඉගෙන ගත්හ. එහෙත් අල්ලාහ්ගේ විධානයෙන් හැරෙන්නට ඔවුහු එමගින් කිසිවෙකුටත් හානියක්

وَيَتَعَلَّمُونَ مَا يَضُرُّهُمْ وَلَا يَنفَعُهُمْ ۚ وَلَقَدْ عَلِمُوا لَمَنِ اشْتَرَاهُ مَا لَهُ فِي الْآخِرَةِ مِنْ خَلَاقٍ ۚ وَلَبِئْسَ مَا شَرَوْا بِهِ أَنفُسَهُمْ ۚ لَوْ كَانُوا يَعْلَمُونَ ﴿١٠٢﴾

නොකළහ. නමුත් (එයට පටහැනිව) මෙම ජනතාව තමන්ට හානිකරන්නාවූද, ප්‍රයෝජන නොදෙන්නාවූද දේ ඉගෙන ගනිති. එහි අයුතු ගණුදෙනු කරන අයෙකුට පරලොවෙහි යහපත් කොටසක් නොලැබෙන බැව් මොවුහු ස්ථිරවම දනිති. තවද, නියතවශයෙන්ම ඔවුන් තම ආත්මයන් විකුණා ලත් දේ ඉතා නපුරකි. ඔවුන් දැන සිටියේ නම්!

وَلَوْ أَنَّهُمْ آمَنُوا وَاتَّقَوْا لَمَثُوبَةٌ مِّنْ عِندِ اللَّهِ خَيْرٌ ۖ لَّوْ كَانُوا يَعْلَمُونَ ﴿١٠٤﴾

104. තවද මොවුන් විශ්වාස කොට බියබැතිමත්ව ක්‍රියා කළේ නම්, නියත වශයෙන්ම අල්ලාහ්ගෙන් ලැබෙන තිළිණය ඉතා හොඳ වන්නට තිබිණි. ඔවුන් දැන සිටියේ නම්!

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَقُولُوا رَاعِنَا وَقُولُوا انظُرْنَا وَاسْمَعُوا ۗ وَلِلْكَافِرِينَ عَذَابٌ أَلِيمٌ ﴿١٠٥﴾

105. එම්බල විශ්වාසිතයිනි! 'රාඉනා'යැයි නොකියනු, එහෙත් 'උන්සුzර්නා' යැයි කියනු. තවද සවන්දෙනු. තවද විශ්වාස නොකරන්නන් හට වේදනීය දඬුවමක් ඇත.

مَّا يَوَدُّ الَّذِينَ كَفَرُوا مِنْ أَهْلِ الْكِتَابِ وَلَا الْمُشْرِكِينَ أَن يُنَزَّلَ عَلَيْكُم مِّنْ خَيْرٍ مِّن رَّبِّكُمْ ۗ وَاللَّهُ يَخْتَصُّ بِرَحْمَتِهِ مَن يَشَاءُ ۚ وَاللَّهُ ذُو الْفَضْلِ الْعَظِيمِ ﴿١٠٦﴾

106. පුස්තකය ලද ජනතාව අතරින් ද (අල්ලාහ්ට) සමාන තබන්නන් අතරින් ද (අපගේ දූතයන්) අවිශ්වාස කළ අය, නුඹලාගේ අධිපතියාණන් වෙතින් කිසිඳු යහපතක් නුඹලා වෙතට පහළ කරනු ලැබීමට කැමැති නොවෙති. එහෙත් අල්ලාහ් ඔහු කැමැති කෙනෙකුව ඔහුගේ දයාව සඳහා තෝරාගන්නේය. තවද අල්ලාහ් මහත්වූ වරප්‍රසාද ඇත්තාය.

مَا نَنسَخْ مِنْ آيَةٍ أَوْ نُنسِهَا نَأْتِ بِخَيْرٍ مِّنْهَا أَوْ مِثْلِهَا ۗ أَلَمْ تَعْلَمْ أَنَّ اللَّهَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿١٠٧﴾

107. යම්කිසි සළකුණක් අප අවලංගු කළහොත් හෝ අමතක කිරීමට සැලසුවහොත් ඒ වෙනුවට අපි එයට වඩා හොඳ එකක් හෝ එවැනිම එකක් රැගෙන එන්නෙමු. අල්ලාහ්ට, ඔහු කැමැති සියළු දේ කිරීමට බලය ඇති බව ඔබ නොදන්නෙහිද?

أَلَمْ تَعْلَمْ أَنَّ اللَّهَ لَهُ مُلْكُ السَّمَاوَاتِ

108. අහස්හිද පොළොවෙහිද රාජ්‍යය අල්ලාහ්ට පමණක් අයත් බව

وَالْاَرْضِ ؕ وَمَا لَكُمْ مِّنْ دُوْنِ اللّٰهِ مِنْ وَّلِيٍّ وَّلَا نَصِيْرٍ ۝١٠٨

ඔබ නොදන්නෙහිද? තවද අල්ලාහ් හැර වෙනත් ආරක්‍ෂකයෙකු හෝ උදව්කරුවෙකු නුඹලාට නොමැත.

اَمْ تُرِيْدُوْنَ اَنْ تَسْـَٔلُوْا رَسُوْلَكُمْ كَمَا سُئِلَ مُوْسٰى مِنْ قَبْلُ ؕ وَمَنْ يَّتَبَدَّلِ الْكُفْرَ بِالْاِيْمَانِ فَقَدْ ضَلَّ سَوَآءَ السَّبِيْلِ ۝١٠٩

109. මෙයට පෙර මූසාගෙන් ප්‍රශ්න කරනු ලැබූවාක් මෙන් නුඹලා වෙතට එවූ දූතයාගෙනුත් නුඹලා ප්‍රශ්න කරන්නෙහුද? තවද කවුරුන් හෝ විශ්වාසය වෙනුවට අවිශ්වාසය හුවමාරු කර ගන්නේද, නිසැකවම ඔහු යහ මාර්ගයෙන් නොමග ගොස්ය.

وَدَّ كَثِيْرٌ مِّنْ اَهْلِ الْكِتٰبِ لَوْ يَرُدُّوْنَكُمْ مِّنْۢ بَعْدِ اِيْمَانِكُمْ كُفَّارًا ۚۖ حَسَدًا مِّنْ عِنْدِ اَنْفُسِهِمْ مِّنْۢ بَعْدِ مَا تَبَيَّنَ لَهُمُ الْحَقُّ ۚ فَاعْفُوْا وَاصْفَحُوْا حَتّٰى يَاْتِيَ اللّٰهُ بِاَمْرِهٖ ؕ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ۝١١٠

110. පුස්තකය ලද ජනතාවගෙන් බොහෝ දෙනෙක් ඔවුන්ට සත්‍යය ප්‍රත්‍යක්‍ෂ වූවායින් පසු, ඔවුන් තුලවූ (මහත්) ඊර්ෂ්‍යයාව හේතුකොට ගෙන, නුඹලා විශ්වාස කළ පසු නැවතත් නුඹලාව අවිශ්වාසිතයින් බවට හැරවීමට කැමැති වෙති. එහෙයින් අල්ලාහ් ඔහුගේ නියෝගය ගෙන එන තුරු නුඹලා ක්‍ෂමාව දී (ඔවුන්ගෙන්) ඉවතට හැරෙනු. නියතවශයෙන්ම, අල්ලාහ්ට ඔහු කැමැති සියළු දේ කිරීමට බලය ඇත.

وَاَقِيْمُوا الصَّلٰوةَ وَاٰتُوا الزَّكٰوةَ ؕ وَمَا تُقَدِّمُوْا لِاَنْفُسِكُمْ مِّنْ خَيْرٍ تَجِدُوْهُ عِنْدَ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ۝١١١

111. තවද නමස්කාරයෙහි නිරත වනු. තවද සැකාත් (දුගී බද්ද) ගෙවනු. තවද නුඹලා වෙනුවෙන් නුඹලා පෙර යැවූ යම් යහපතක් වේ නම්, නුඹලා එය අල්ලාහ්ගෙන් ලබන්නෙහුය. නියතවශයෙන්ම අල්ලාහ් නුඹලා කරන සියළු දේ දකින්නාය.

وَقَالُوْا لَنْ يَّدْخُلَ الْجَنَّةَ اِلَّا مَنْ كَانَ هُوْدًا اَوْ نَصٰرٰى ؕ تِلْكَ اَمَانِيُّهُمْ ؕ قُلْ هَاتُوْا بُرْهَانَكُمْ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ۝١١٢

112. තවද 'යුදෙව්වෙකු හෝ කිතුනුවෙකු හෝ නොවන අන් කිසිවෙක් කිසිදා ස්වර්ගයට නොපිවිසෙන්නේය'යි ඔවුහු කියති. මේවා ඔවුන්ගේ පුහු ආශාවන්ය. 'නුඹලා සත්‍යවාදීන් වේ නම්, නුඹලාගේ සාධක ඉදිරිපත් කරනු' යි පවසන්න.

113. නොඑසේය, යමෙක් තමන්ව මුළුමනින්ම අල්ලාහ්ට අවනත කරමින් ඔහුගේ යහ ක්‍රියාවෙහි උතුම් වන්නේද, ඔහුගේ තිළිණ ඔහුගේ අධිපතියාණන්ගෙන් ලැබෙනු ඇත. එවැන්නන්ට කිසිඳු බියක් (පැමිණෙන්නේ) නැත. ඔවුන් ශෝක වන්නේද නැත.

بَلٰى مَنۡ اَسۡلَمَ وَجۡهَهٗ لِلّٰهِ وَهُوَ مُحۡسِنٌ فَلَهٗۤ اَجۡرُهٗ عِنۡدَ رَبِّهٖ وَلَا خَوۡفٌ عَلَيۡهِمۡ وَلَا هُمۡ يَحۡزَنُوۡنَ ﴿١١٣﴾

114. තවද 'කිතුනුවන් කිසිඳු ස්ථාවරයක් මත නැතැ'යි යුදෙව්වරු පවසති. එසේම 'යුදෙව්වන් කිසිඳු ස්ථාවරයක් මත නැතැ'යි කිතුනුවරු පවසති. එහෙත් ඔවුහු (දෙපිරිසම එකම) පුස්තකය හදාරති. මෙසේ ඔවුන් පවසන පරිද්දම, කිසිඳු දැනුමක් නොමැත්තෝද පවසති. නමුත් ඔවුන් එකඟ නොවූ දේ සම්බන්ධව පුනරුත්ථාන දිනයේදී අල්ලාහ් ඔවුනතර විනිශ්චය කරන්නේය.

وَقَالَتِ الۡيَهُوۡدُ لَيۡسَتِ النَّصٰرٰى عَلٰى شَىۡءٍ وَّقَالَتِ النَّصٰرٰى لَيۡسَتِ الۡيَهُوۡدُ عَلٰى شَىۡءٍ ۙ وَّهُمۡ يَتۡلُوۡنَ الۡكِتٰبَ ؕ كَذٰلِكَ قَالَ الَّذِيۡنَ لَا يَعۡلَمُوۡنَ مِثۡلَ قَوۡلِهِمۡ ۚ فَاللّٰهُ يَحۡكُمُ بَيۡنَهُمۡ يَوۡمَ الۡقِيٰمَةِ فِيۡمَا كَانُوۡا فِيۡهِ يَخۡتَلِفُوۡنَ ﴿١١٤﴾

115. තවද අල්ලාහ්ගේ නැමදුම් ස්ථානයන්හි අල්ලාහ්ගේ නාමය කීර්තිමත් කරනු ලැබීම වළක්වා, ඒවා විනාශ කිරීමට තැත් කරන්නාට වඩා අදමිටුවා වන්නේ අන් කවරෙක්ද? එවැනි අයට බියෙන් මිස එහි ඇතුල්වීම සුදුසු නොවීය. ඔවුනට මෙලොවෙහිදී නින්දාව අත්වේ. තවද පරලොවෙහිදී ඔවුනට මහත්වූ දඬුවමක්ද ඇත.

وَمَنۡ اَظۡلَمُ مِمَّنۡ مَّنَعَ مَسٰجِدَ اللّٰهِ اَنۡ يُّذۡكَرَ فِيۡهَا اسۡمُهٗ وَسَعٰى فِىۡ خَرَابِهَا ؕ اُولٰٓئِكَ مَا كَانَ لَهُمۡ اَنۡ يَّدۡخُلُوۡهَاۤ اِلَّا خَآئِفِيۡنَ ؕ لَهُمۡ فِى الدُّنۡيَا خِزۡىٌ وَّلَهُمۡ فِى الۡاٰخِرَةِ عَذَابٌ عَظِيۡمٌ ﴿١١٥﴾

116. නැගෙනහිරද බස්නාහිරද අල්ලාහ්ටම අයත්ය. එහෙයින් නුඹලා කුමන දිශාවකට හැරුණද අල්ලාහ්ගේ මුහුණ (අවධානය) එදෙස වන්නේය. ඇත්තෙන්ම, අල්ලාහ් සමෘද්ධි සම්පන්නය, සියල්ල දත්තාය.

وَلِلّٰهِ الۡمَشۡرِقُ وَالۡمَغۡرِبُ ۚ فَاَيۡنَمَا تُوَلُّوۡا فَثَمَّ وَجۡهُ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ وَاسِعٌ عَلِيۡمٌ ﴿١١٦﴾

117. තවද 'අල්ලාහ් (ඔහුට) පුතෙකු ඇතිකර ගත්තේයැ'යි ඔවුහු කියති. ඔහු සුවිශුද්ධය! එපමණක්ද නොව, අහස්හි සහ පොළොවෙහි ඇති සියලු දේවල් ඔහුටම අයත් වේ.

وَقَالُوا اتَّخَذَ اللّٰهُ وَلَدًا ۙ سُبۡحٰنَهٗ ؕ بَلۡ لَّهٗ مَا فِى السَّمٰوٰتِ وَالۡاَرۡضِ ؕ كُلٌّ لَّهٗ

قٰنِتُوْنَ ﴿١١٧﴾

සියල්ල ඔහුට කීකරුය.

بَدِيْعُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ وَاِذَا قَضٰٓى اَمْرًا فَاِنَّمَا يَقُوْلُ لَهٗ كُنْ فَيَكُوْنُ ﴿١١٨﴾

118. අහස් හා පොළොවේ උත්පාදකයා (ඔහුය). ඔහු යම් දෙයක් තීන්දු කරනවිට එයට 'වනු!' යි පමණක් ඔහු පවසන්නේය. එවිට එය වන්නේය.

وَقَالَ الَّذِيْنَ لَا يَعْلَمُوْنَ لَوْلَا يُكَلِّمُنَا اللّٰهُ اَوْ تَاْتِيْنَآ اٰيَةٌ ؕ كَذٰلِكَ قَالَ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ مِّثْلَ قَوْلِهِمْ ؕ تَشَابَهَتْ قُلُوْبُهُمْ ؕ قَدْ بَيَّنَّا الْاٰيٰتِ لِقَوْمٍ يُّوْقِنُوْنَ ﴿١١٩﴾

119. තවද 'අල්ලාහ් අපට කථා නොකරන්නේ හෝ කිසිඳු සලකුණක් අප වෙත නොඑන්නේ හෝ මන්දැ?'යි දැනුම නොමැත්තෝ පවසති. මෙලෙසම මොවුන්ට පෙරවූ අයද මොවුන්ගේ ප්‍රකාශයට සමාන දේ ප්‍රකාශ කළහ. මොවුන්ගේ හදවත් එක හා සමානය. දැඩිව විශ්වාස කරන ජනතාවට නිශ්චිතවම අපි සලකුණු පැහැදිලි කර ඇත්තෙමු.

اِنَّآ اَرْسَلْنٰكَ بِالْحَقِّ بَشِيْرًا وَّ نَذِيْرًا ۙ وَّلَا تُسْـَٔلُ عَنْ اَصْحٰبِ الْجَحِيْمِ ﴿١٢٠﴾

120. අපි ඔබව ශුභාරංචි ගෙන එන්නෙකු ලෙසද අවවාද කරන්නෙකු ලෙසද සත්‍යය සමග එව්වෙමු. තවද නිරයෙහි වැසියන් සම්බන්ධයෙන් ඔබ ප්‍රශ්ණ කරනු නොලබන්නෙහිය.

وَلَنْ تَرْضٰى عَنْكَ الْيَهُوْدُ وَلَا النَّصٰرٰى حَتّٰى تَتَّبِعَ مِلَّتَهُمْ ؕ قُلْ اِنَّ هُدَى اللّٰهِ هُوَ الْهُدٰى ؕ وَلَئِنِ اتَّبَعْتَ اَهْوَآءَهُمْ بَعْدَ الَّذِىْ جَآءَكَ مِنَ الْعِلْمِ ۙ مَا لَكَ مِنَ اللّٰهِ مِنْ وَّلِىٍّ وَّلَا نَصِيْرٍ ﴿١٢١﴾

121. තවද ඔබ ඔවුන්ගේ ධර්මය අනුගමනය කරන තුරු යුදෙව්වන් මෙන්ම කිතුනුවන්ද ඔබ කෙරෙහි කිසිවිටෙකත් ප්‍රසාදයට පත් නොවන්නෝය. 'නියතවශයෙන්ම අල්ලාහ්ගේ මග පෙන්වීම පමණක්ම මග පෙන්වීම වේ' යැයි පවසන්න. තවද ඔබ වෙතට ඥානය පැමිණි පසුවද, ඔබ ඔවුන්ගේ නපුරු සිතැඟියාවන් අනුගමනය කරන්නේ නම්, ඔබට අල්ලාහ්ගෙන් මිතුරෙකු හෝ උදව්කරුවෙකු හෝ නොවනු ඇත.

اَلَّذِيْنَ اٰتَيْنٰهُمُ الْكِتٰبَ يَتْلُوْنَهٗ حَقَّ تِلَاوَتِهٖ ؕ اُولٰٓئِكَ يُؤْمِنُوْنَ بِهٖ ؕ وَمَنْ

122. අප කවුරුන් හට ග්‍රන්ථය දි ඇත්තේද, ඔවුහු, එය පිළිපැදිය යුතු ආකාරයටම පිළිපදින්නෝය. එය විශ්වාස කරන්නෝ ඔවුහුමය. තවද කවුරුන් හෝ එය විශ්වාස

يَّكۡفُرۡ بِهٖ فَاُولٰٓـئِكَ هُمُ الۡخٰسِرُوۡنَ ﴿١٢٢﴾

නොකරන්නේද, පාඩු විඳින්නෝ ඔවුහුමය.

يٰبَنِىۡٓ اِسۡرَآءِيۡلَ اذۡكُرُوۡا نِعۡمَتِىَ الَّتِىۡٓ اَنۡعَمۡتُ عَلَيۡكُمۡ وَاَنِّىۡ فَضَّلۡتُكُمۡ عَلَى الۡعٰلَمِيۡنَ ﴿١٢٣﴾

123. එම්බල ඉස්රාඊල් දරුවනි! මා නුඹලා වෙත පිරිනැමූ මාගේ අනුග්‍රහයද, සියලු ජනතාවට වඩා මා නුඹලා උසස් කළ අවස්ථාවද සිහිපත් කරනු.

وَاتَّقُوۡا يَوۡمًا لَّا تَجۡزِىۡ نَفۡسٌ عَنۡ نَّفۡسٍ شَيۡـئًا وَّلَا يُقۡبَلُ مِنۡهَا عَدۡلٌ وَّلَا تَنۡفَعُهَا شَفَاعَةٌ وَّلَا هُمۡ يُنۡصَرُوۡنَ ﴿١٢٤﴾

124. එක් ආත්මයක් වෙනුවට අන් ආත්මයක් කිසිසේත් ඉදිරිපත් විය නොහැකි වන්නාවූද, එයගෙන් වන්දියක් භාරගනු නොලබන්නාවූද, එයට කිසිඳු මැදිහත්වීමක් ප්‍රයෝජනය නොවන්නාවූද, ඔවුන්ට උදව් කරනු නොලබන්නාවූද දිනයට බියවනු.

وَاِذِ ابۡتَلٰٓى اِبۡرٰهٖمَ رَبُّهٗ بِكَلِمٰتٍ فَاَتَمَّهُنَّ ‌ؕ قَالَ اِنِّىۡ جَاعِلُكَ لِلنَّاسِ اِمَامًا ‌ؕ قَالَ وَمِنۡ ذُرِّيَّتِىۡ ‌ؕ قَالَ لَا يَنَالُ عَهۡدِى الظّٰلِمِيۡنَ ﴿١٢٥﴾

125. තවද ඉබ්රාහිම්ව ඔහුගේ අධිපතියාණන් ඇතැම් අණපනත් මගින් පිරික්සා, ඔහු ඒවා ඉටු කළ අවස්ථාවද (සිහිපත් කරනු). 'මා ඔබව මිනිසුන්ගේ නායකයෙකු කරන්නෙමි'යි ඔහු (අල්ලාහ්) කීවේය. 'තවද මාගෙන් පැවතෙන්නන් අතරින්දැ?'යි (ඉබ්රාහිම්) ඇසීය. 'මාගේ ගිවිසුම සීමාව ඉක්මවන්නන්ව ඇතුලත් නොකරන්නේ යැ'යි ඔහු කීවේය.

وَاِذۡ جَعَلۡنَا الۡبَيۡتَ مَثَابَةً لِّلنَّاسِ وَاَمۡنًا ؕ وَاتَّخِذُوۡا مِنۡ مَّقَامِ اِبۡرٰهٖمَ مُصَلًّى‌ ؕ وَعَهِدۡنَآ اِلٰٓى اِبۡرٰهٖمَ وَاِسۡمٰعِيۡلَ اَنۡ طَهِّرَا بَيۡتِىَ لِلطَّآئِفِيۡنَ وَالۡعٰكِفِيۡنَ وَالرُّكَّعِ السُّجُوۡدِ ﴿١٢٦﴾

126. තවද මිනිස් වර්ගයා උදෙසා එම නිවස නවාතැනක් ලෙසද අභය (ස්ථානයක්) ලෙසද අප තැනූ (අවස්ථාව සිහිපත් කරනු). එමෙන්ම නුඹලා ඉබ්රාහිම් සිටගත් තැන නැමදුම් ස්ථානයක් කරගනු. තවද අප, 'එය වටා යන අයටද, නැමදුම සඳහා (එහි) රැඳී සිටින්නවුන්ටද, නැමී සහ දණින් වැටී (නමදින) අයටද මාගේ නිවස පවිත්‍ර කරනු'යි (පවසමින්) ඉබ්රාහිම්ට සහ ඉස්මාඊල්ට අපි නියෝග කළෙමු.

وَاِذۡ قَالَ اِبۡرٰهٖمُ رَبِّ اجۡعَلۡ هٰذَا بَلَدًا

127. තවද 'මාගේ අධිපතියාණෙනි! මෙය සාම පුරවරයක් කරනු මැනව,

තවද එහි වෙසෙන්නන්ගෙන් අල්ලාහ් සහ අවසාන දිනය කෙරෙහි විශ්වාස කරන අයට සියළු වර්ගයේ පළතුරුද සපයනු මැනවැ'යි ඉබ්රාහිම් කියූ අවස්ථාව (සිහිපත් කරනු). 'තවද විශ්වාස නොකරන කවරෙකු හෝ වේද, ඔහුටත් සුළු කාලයක් වනතුරු මම ඵලප්‍රයෝජන සලසන්නෙමි. පසුව ඔහුව නිරා ගින්නේ දඬුවමට ඇද දමන්නෙමි. එය නපුරු ගමනාන්තයක් යැ'යි ඔහු පැවසුවේය.

اٰمِنًا وَّارْزُقْ اَهْلَهٗ مِنَ الثَّمَرٰتِ مَنْ اٰمَنَ مِنْهُمْ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ ؕ قَالَ وَمَنْ كَفَرَ فَاُمَتِّعُهٗ قَلِيْلًا ثُمَّ اَضْطَرُّهٗۤ اِلٰى عَذَابِ النَّارِ ؕ وَبِئْسَ الْمَصِيْرُ ﴿۱۲۷﴾

128. තවද ඉබ්රාහිම් හා ඉස්මාඊල්, 'අපගේ අධිපතියාණෙනි! අපගෙන් (මෙය) පිළිගනු මැනව. ඇත්තෙන්ම ඔබ සියල්ල අසන්නාද සියල්ල දත්තාද වේ' (යැයි ප්‍රාර්ථනා කරමින්) එම නිවසේ අත්තිවාරම් එසවූ අවස්ථාව (සිහිපත් කරනු).

وَاِذْ يَرْفَعُ اِبْرٰهٖمُ الْقَوَاعِدَ مِنَ الْبَيْتِ وَاِسْمٰعِيْلُ ؕ رَبَّنَا تَقَبَّلْ مِنَّا ؕ اِنَّكَ اَنْتَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿۱۲۸﴾

129. 'අපගේ අධිපතියාණෙනි! අප දෙදෙනා ඔබට අවනතවූවන් කරනු මැනව, තවද අපගෙන් පැවත එනවුන්වද ඔබට අවනතවන්නාවූ ජනතාවක් (කරනු මැනව). තවද අපගේ නැමදුම් පිළිවෙත් අපහට පෙන්වා දෙනු මැනව. තවද දයාවෙන් යුතුව අප වෙත හැරෙනු මැනව. මන්ද ඔබ (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය, දයානුකම්පිතය'.

رَبَّنَا وَاجْعَلْنَا مُسْلِمَيْنِ لَكَ وَمِنْ ذُرِّيَّتِنَاۤ اُمَّةً مُّسْلِمَةً لَّكَ ۪ وَاَرِنَا مَنَاسِكَنَا وَتُبْ عَلَيْنَا ۚ اِنَّكَ اَنْتَ التَّوَّابُ الرَّحِيْمُ ﴿۱۲۹﴾

130. 'තවද අපගේ අධිපතියාණෙනි! ඔබගේ සළකුණු ඔවුනට කියා දෙන්නාවූද, ඔවුනට ග්‍රන්ථයත් ප්‍රඥාවත් හදාරන්නාවූද, ඔවුන් පරිශුද්ධ කරන්නාවූද, ඔවුනතුරින් එක් දූතයෙකු ඔවුන්වෙත පහළ කරනු මැනව. ඇත්තෙන්ම ඔබ බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය'

رَبَّنَا وَابْعَثْ فِيْهِمْ رَسُوْلًا مِّنْهُمْ يَتْلُوْا عَلَيْهِمْ اٰيٰتِكَ وَيُعَلِّمُهُمُ الْكِتٰبَ وَالْحِكْمَةَ وَيُزَكِّيْهِمْ ؕ اِنَّكَ اَنْتَ الْعَزِيْزُ الْحَكِيْمُ ﴿۱۳۰﴾ ع

131. තවද ඉබ්රාහිම්ගේ ධර්මයෙන් ඉවත හැරෙන්නේ තමාව මෝඩයෙකු බවට පත්කරගත් අයෙකු විනා අන් කවරෙකුද? ඇත්තෙන්ම අපි ඔහුව(ඉබ්රාහිම්ව) මෙලොවෙහිදී

وَمَنْ يَّرْغَبُ عَنْ مِّلَّةِ اِبْرٰهٖمَ اِلَّا مَنْ سَفِهَ نَفْسَهٗ ؕ وَلَقَدِ اصْطَفَيْنٰهُ فِى الدُّنْيَا ۚ

وَاِنَّهٗ فِى الْاٰخِرَةِ لَمِنَ الصّٰلِحِيْنَ ﴿١٣١﴾

තෝ'රා ගත්තෙමු, තවද නියතවශයෙන්ම, පරලොවෙහිදී ඔහු ධාර්මිෂ්ඨකයින් අතර වන්නේය.

اِذْ قَالَ لَهٗ رَبُّهٗٓ اَسْلِمْ ۙ قَالَ اَسْلَمْتُ لِرَبِّ الْعٰلَمِيْنَ ﴿١٣٢﴾

132. ඔහුගේ අධිපතියාණන් 'අවනත වනු'යි ඔහුට පැවසූ කල්හි, 'සර්ව ලෝකයන්ට අධිපතියාණන් හට මම අවනත වූයෙමි'යි ඔහු පැවසුවේය.

وَوَصّٰى بِهَآ اِبْرٰهٖمُ بَنِيْهِ وَيَعْقُوْبُ ؕ يٰبَنِىَّ اِنَّ اللّٰهَ اصْطَفٰى لَكُمُ الدِّيْنَ فَلَا تَمُوْتُنَّ اِلَّا وَاَنْتُمْ مُّسْلِمُوْنَ ؕ ﴿١٣٣﴾

133. ඉබ්රාහිම් ඔහුගේ පුත්‍රයින්ට මෙලෙස (පවසමින්) අණ කළේය. තවද යඃකූබ්ද (එලෙසම කළේය). 'එම්බල මාගේ පුත්‍රයිනි! ඇත්තෙන්ම අල්ලාහ් මෙම ධර්මය නුඹලා සඳහා තෝරා ගෙන ඇත්තේය. එබැවින් නුඹලා මුළුමනින්ම අවනතව සිටින අවස්ථාවේ මිස නුඹලා මරණයට පත් නොවේවා!.'

اَمْ كُنْتُمْ شُهَدَآءَ اِذْ حَضَرَ يَعْقُوْبَ الْمَوْتُ ۙ اِذْ قَالَ لِبَنِيْهِ مَا تَعْبُدُوْنَ مِنْۢ بَعْدِىْ ؕ قَالُوْا نَعْبُدُ اِلٰهَكَ وَاِلٰهَ اٰبَآئِكَ اِبْرٰهٖمَ وَاِسْمٰعِيْلَ وَاِسْحٰقَ اِلٰهًا وَّاحِدًا ۖۚ وَّنَحْنُ لَهٗ مُسْلِمُوْنَ ﴿١٣٤﴾

134. යඃකූබ්ට මරණය පැමිණි අවස්ථාවේදී නුඹලා සිටියෙහුද?. ඔහු තම පුත්‍රයින්ගෙන් 'මාගෙන් පසු නුඹලා කවරෙකු අදහන්නෙහුද?'යි විමසූ විට 'ඔබගේ දෙවියන්ද, ඔබගේ පියවරුන් වන ඉබ්රාහිම්, ඉස්මාඊල් සහ ඉස්හාක් යන අයගේද දෙවියන් වන එකම දෙවියන් අපි අදහන්නෙමු: ඔහුටම අපි අවනත වන්නෙමු'යි ඔවුහු පිළිතුරු දුන්හ.

تِلْكَ اُمَّةٌ قَدْ خَلَتْ ۚ لَهَا مَا كَسَبَتْ وَلَكُمْ مَّا كَسَبْتُمْ ۚ وَلَا تُسْئَلُوْنَ عَمَّا كَانُوْا يَعْمَلُوْنَ ﴿١٣٥﴾

135. ඔවුන් කාලක්‍රියා කළ එක් සමූහයකි. ඔවුන් ඉපැයූ දේ ඔවුන්ටය. නුඹලා උපයන දේ නුඹලාටය. ඔවුන් කළ දේ පිළිබඳව නුඹලා ප්‍රශ්න කරනු නොලබන්නෙහුය.

وَقَالُوْا كُوْنُوْا هُوْدًا اَوْ نَصٰرٰى تَهْتَدُوْا ؕ قُلْ بَلْ مِلَّةَ اِبْرٰهٖمَ حَنِيْفًا ؕ وَمَا كَانَ مِنَ

136. තවද 'නුඹලා යහමග ලබනු පිණිස නුඹලා යුදෙව්වන් හෝ කිතුනුවන් හෝ වනු'යි ඔවුහු කියති. 'නොඑසේය, නිරතුරුවම (දෙවියන් වෙතට) නැඹුරුවූ ඉබ්රාහිම්ගේ

الْمُشْرِكِيْنَ ﴿١٣٦﴾

ධර්මය (නුඹලා අනුගමනය කරනු). ඔහු (අල්ලාහ්ට) සමාන තබන අයගෙන් නොවීයැ'යි පවසන්න.

قُوْلُوْٓا اٰمَنَّا بِاللّٰهِ وَمَآ اُنْزِلَ اِلَيْنَا وَمَآ اُنْزِلَ اِلٰٓى اِبْرٰهٖمَ وَاِسْمٰعِيْلَ وَاِسْحٰقَ وَيَعْقُوْبَ وَالْاَسْبَاطِ وَمَآ اُوْتِىَ مُوْسٰى وَعِيْسٰى وَمَآ اُوْتِىَ النَّبِيُّوْنَ مِنْ رَّبِّهِمْ ۚ لَا نُفَرِّقُ بَيْنَ اَحَدٍ مِّنْهُمْ ۖ وَنَحْنُ لَهٗ مُسْلِمُوْنَ ﴿١٣٧﴾

137. 'අපි අල්ලාහ් කෙරෙහිද, අප වෙත පහළ කරනු ලැබූ දේ කෙරෙහිද, ඉබ්රාහිම්ටද, ඉස්මාඊල්ටද, ඉස්හාක්ටද, යඃකූබ්ටද, (ඔහුගේ) දරුවන්ටද, පහළ කරනු ලැබූ දේ කෙරෙහිද මූසාට සහ ඊසාට දෙන ලද දේ කෙරෙහිද, (අන් සියලු) වක්තෘවරුන්ට ඔවුන්ගේ අධිපතියාණන් විසින් දෙන ලද දේ කෙරෙහිද විශ්වාස කරන්නෙමු. අපි ඔවුන්ගෙන් කිසිවෙකු අතර වෙනසක් නොදක්වමු. තවද අපි ඔහුටම අවනතවූවන් වෙමු'යි නුඹලා පවසනු.

فَاِنْ اٰمَنُوْا بِمِثْلِ مَآ اٰمَنْتُمْ بِهٖ فَقَدِ اهْتَدَوْا ۚ وَاِنْ تَوَلَّوْا فَاِنَّمَا هُمْ فِىْ شِقَاقٍ ۚ فَسَيَكْفِيْكَهُمُ اللّٰهُ ۚ وَهُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿١٣٨﴾

138. තවද නුඹලා එය විශ්වාස කළ ආකාරයටම ඔවුන්ද විශ්වාස කළේ නම්, එවිට නියතවශයෙන්ම ඔවුහු යහමග ලද්දෝ වෙති. එහෙත් ඔවුන් පිටුපෑවේ නම්, එවිට ඔවුහු මතභේද ඇතිකරමින් පමණක් සිටිති. තවද ඔවුන්ට එරෙහිව ඔබට නියතවශයෙන්ම අල්ලාහ් ප්‍රමාණවත් වන්නේය. තවද ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

صِبْغَةَ اللّٰهِ ۚ وَمَنْ اَحْسَنُ مِنَ اللّٰهِ صِبْغَةً ۖ وَّنَحْنُ لَهٗ عٰبِدُوْنَ ﴿١٣٩﴾

*139. 'අල්ලාහ්ගේ ධර්මය (අපි අනුගමනය කරන්නෙමු). තවද ධර්මය (ඉගැන්වීමෙහිදී) අල්ලාහ්ට වඩා ශ්‍රේෂ්ඨ කවරෙක්ද, එමෙන්ම අපි ඔහුවම පමණක් නමදින්නෙමු.'(යි පවසනු).

قُلْ اَتُحَآجُّوْنَنَا فِى اللّٰهِ وَهُوَ رَبُّنَا وَرَبُّكُمْ ۚ وَلَنَآ اَعْمَالُنَا وَلَكُمْ اَعْمَالُكُمْ ۚ وَنَحْنُ لَهٗ مُخْلِصُوْنَ ﴿١٤٠﴾ ۙ

140. නුඹලා අල්ලාහ් පිළිබඳව අප හා විවාද කරන්නෙහුද? 'ඔහු අපගේ අධිපතියාණන්ද නුඹලාගේද අධිපතියාණන් වන්නේය. තවද අපගේ ක්‍රියාවන් අපටය, එමෙන්ම නුඹලාගේ ක්‍රියාවන් නුඹලාටය. අපි ඔහුටම අවංකභාවයෙන් කැපවන්නන් වෙමු'යි පවසන්න.

*සටහන. 139: අල්ලාහ්ගේ ධර්මය යන්නෙන් අදහස් වන්නේ දෙවියන් යම් ධර්මයක් පිළිපදින බව නොවේ. එයින් අදහස් වන්නේ දෙවියන් විසින් පහළ කරන ලද ධර්මයක් යන්නයි.

أَمْ تَقُولُونَ إِنَّ إِبْرٰهٖمَ وَإِسْمٰعِيلَ وَإِسْحٰقَ وَيَعْقُوبَ وَالْأَسْبَاطَ كَانُوا هُودًا أَوْ نَصٰرٰى ۗ قُلْ ءَأَنْتُمْ أَعْلَمُ أَمِ اللّٰهُ ۗ وَمَنْ أَظْلَمُ مِمَّنْ كَتَمَ شَهَادَةً عِنْدَهُۥ مِنَ اللّٰهِ ۗ وَمَا اللّٰهُ بِغٰفِلٍ عَمَّا تَعْمَلُونَ ﴿١٤١﴾

141. ඉබ්රාහිම්ද, ඉස්මාඊල්ද, ඉස්හාක්ද, යඃකූබ් සහ (ඔහුගේ) දරුවන්ද යුදෙව්වන් හෝ කිතුනුවන් හෝ වූයේ යැයි නුඹලා පවසන්නෙහුද? 'වඩාත් හොඳින් දන්නේ නුඹලාද නැතහොත් අල්ලාහ් දැ?'යි අසන්න. තවද අල්ලාහ්ගෙන් ඔහු වෙත ලැබූ සාක්ෂිය සඟවන තැනැත්තාට වඩා අදමිටුවා වන්නේ අන් කවරෙක්ද? තවද නුඹලා කරන දේ අල්ලාහ් දැන නොසිටින්නා නොවේ.

تِلْكَ أُمَّةٌ قَدْ خَلَتْ ۖ لَهَا مَا كَسَبَتْ وَلَكُمْ مَّا كَسَبْتُمْ ۖ وَلَا تُسْـَٔلُونَ عَمَّا كَانُوا يَعْمَلُونَ ﴿١٤٢﴾ ع

142. ඔවුන් කාලක්‍රියා කළ එක් සමූහයකි. ඔවුන් ඉපැයූ දේ ඔවුන්ටය. නුඹලා උපයන දේ නුඹලාටය. ඔවුන් කළ දේ පිළිබඳව නුඹලා ප්‍රශ්න කරනු නොලබන්නෙහුය.

2-කොටස

سَيَقُولُ السُّفَهَآءُ مِنَ النَّاسِ مَا وَلّٰىهُمْ عَنْ قِبْلَتِهِمُ الَّتِي كَانُوا عَلَيْهَا ۚ قُلْ لِّلّٰهِ الْمَشْرِقُ وَالْمَغْرِبُ ۚ يَهْدِي مَنْ يَّشَآءُ إِلٰى صِرٰطٍ مُّسْتَقِيمٍ ﴿١٤٣﴾

143. 'ඔවුන් අනුගමනය කල ඔවුන්ගේ කිබ්ලාව වෙතින් ඔවුන්ව හරවා ඇත්තේ කුමක්දැ?'යි මිනිසුන් අතරින් මෝඩයින් පවසන්නෝය. 'නැගෙනහිරද බස්නාහිරද අල්ලාහ්ටම අයත්ය. ඔහු කැමති කෙනෙකුව ඔහු සෘජුමග වෙත යොමු කරන්නේයැ'යි පවසන්න.

وَكَذٰلِكَ جَعَلْنٰكُمْ أُمَّةً وَّسَطًا لِّتَكُونُوا شُهَدَآءَ عَلَى النَّاسِ وَيَكُونَ الرَّسُولُ عَلَيْكُمْ شَهِيدًا ۗ وَمَا جَعَلْنَا الْقِبْلَةَ الَّتِي كُنْتَ عَلَيْهَآ إِلَّا لِنَعْلَمَ مَنْ يَّتَّبِعُ الرَّسُولَ مِمَّنْ يَّنْقَلِبُ عَلٰى عَقِبَيْهِ ۗ وَإِنْ

144. තවද මේ ආකාරයටම නුඹලා මිනිසුන් කෙරෙහි භාරකරුවන් ලෙසද, (දෙවියන්ගේ) දූතයාණන් නුඹලා කෙරෙහි භාරකරුවෙකු ලෙසද වනු පිණිස අපි නුඹලාව උසස් ජන සමූහයක් කළෙමු. එමෙන්ම (දෙවියන්ගේ) දූතයාණන්ව අනුගමනය කරන තැනැත්තාව තම පාවිලුඹ ඔස්සේ හැරී යන අයගෙන් අප දැනගන්නට මිස ඔබ පිළිපදිමින් සිටි කිබ්ලාව අපි නියම නොකළෙමු. තවද අල්ලාහ් මග පෙන්වූ අයට හැර අන් අයට ඇත්තෙන්ම මෙය

كَانَتْ لَكَبِيرَةً إِلَّا عَلَى الَّذِينَ هَدَى اللَّهُ ۗ
وَمَا كَانَ اللَّهُ لِيُضِيعَ إِيمَانَكُمْ ۚ إِنَّ اللَّهَ
بِالنَّاسِ لَرَءُوفٌ رَّحِيمٌ ﴿١٤٤﴾

දුෂ්කරය. තවද නුඹලාගේ විශ්වාසය නිශ්ඵල වීමට අල්ලාහ් ඉඩ නොදෙන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියලු මිනිසුන් කෙරෙහි සානුකම්පිතය, (තවද) පරම දයාබරය.

قَدْ نَرَىٰ تَقَلُّبَ وَجْهِكَ فِي السَّمَاءِ ۖ
فَلَنُوَلِّيَنَّكَ قِبْلَةً تَرْضَاهَا ۚ فَوَلِّ وَجْهَكَ
شَطْرَ الْمَسْجِدِ الْحَرَامِ ۚ وَحَيْثُ مَا كُنتُمْ
فَوَلُّوا وُجُوهَكُمْ شَطْرَهُ ۗ وَإِنَّ الَّذِينَ
أُوتُوا الْكِتَابَ لَيَعْلَمُونَ أَنَّهُ الْحَقُّ مِن
رَّبِّهِمْ ۗ وَمَا اللَّهُ بِغَافِلٍ عَمَّا يَعْمَلُونَ ﴿١٤٥﴾

145. ඔබගේ මුහුණ නිතරම අහස දෙසට හැරවීම අපි සැබවින්ම දකින්නෙමු. එසේනම් නියත වශයෙන්ම ඔබ ප්‍රිය කරන්නාවූ කිබ්ලාව දෙසට අපි ඔබව හරවන්නෙමු. එබැවින් ඔබගේ මුහුණ ශුද්ධවූ නැමදුම් ස්ථානය දෙසට හරවන්න. තවද නුඹලා කොතැනක සිටියද, නුඹලාගේ මුහුණු ඒ දෙසට හරවනු. තවද පුස්තකය දෙන ලද්දන් මෙය ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යයක් බව නියතවශයෙන්ම දනිති. තවද අල්ලාහ් ඔවුන් කරන දේ ගැන නොසැළකිලිමත් නොවේ.

وَلَئِنْ أَتَيْتَ الَّذِينَ أُوتُوا الْكِتَابَ بِكُلِّ
آيَةٍ مَّا تَبِعُوا قِبْلَتَكَ ۚ وَمَا أَنتَ بِتَابِعٍ
قِبْلَتَهُمْ ۚ وَمَا بَعْضُهُم بِتَابِعٍ قِبْلَةَ بَعْضٍ ۚ
وَلَئِنِ اتَّبَعْتَ أَهْوَاءَهُم مِّن بَعْدِ مَا
جَاءَكَ مِنَ الْعِلْمِ ۙ إِنَّكَ إِذًا لَّمِنَ
الظَّالِمِينَ ﴿١٤٦﴾ وقف لازم

146. තවද පුස්තකය දෙන ලද අය වෙතට ඔබ සෑම සලකුණක්ම ගෙන හැර පෑවද ඔවුහු ඔබගේ කිබ්ලාව අනුගමනය නොකරන්නෝමය. එසේම ඔබද ඔවුන්ගේ කිබ්ලාව අනුගමනය නොකරන්නෙහිමය. එමෙන්ම ඔවුන්ගෙන් සමහරෙක් අන් සමහරෙකුගේ කිබ්ලාව අනුගමනය නොකරන්නෝය. තවද ඔබට ඥානය පැමිණි පසුවද ඔබ ඔවුන්ගේ සිතැඟියාවන් පිළිපදින්නේ නම්, නියතවශයෙන්ම ඔබ සීමාව ඉක්මවන්නන්ගෙන් වන්නෙහිය.

*147. අප කවුරුන් හට පුස්තකය දී ඇත්තේද, ඔවුහු, ඔවුන්ගේ පුතුන් හඳුනා ගන්නාක් මෙන් 'එය' (සත්‍යයක් ලෙස) හඳුනා ගනිති. නමුත් නියතවශයෙන්ම ඔවුන්ගෙන් සමහරෙක් දැනුවත්වම සත්‍යය වසන් කරති.

اَلَّذِيۡنَ اٰتَيۡنٰهُمُ الۡكِتٰبَ يَعۡرِفُوۡنَهٗ كَمَا يَعۡرِفُوۡنَ اَبۡنَآءَهُمۡ ؕ وَاِنَّ فَرِيۡقًا مِّنۡهُمۡ لَيَكۡتُمُوۡنَ الۡحَقَّ وَهُمۡ يَعۡلَمُوۡنَ ﴿۱۴۷﴾

148. (මෙය) ඔබගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යය වේ. එබැවින් ඔබ කිසිවිටෙකත් සැක කරන්නන්ගෙන් කෙනෙකු නොවන්න.

اَلۡحَقُّ مِنۡ رَّبِّكَ فَلَا تَكُوۡنَنَّ مِنَ الۡمُمۡتَرِيۡنَ ﴿۱۴۸﴾

149. තවද සෑම කෙනෙකුටම අරමුණක් ඇත. එය වෙත ඔහු මුළු අවධානය යොමු කරයි. එබැවින් නුඹලා යහපත් ක්‍රියාවන්හි එකිනෙකා අතර තරඟ කරනු. නුඹලා කොතැනක සිටියද, අල්ලාහ් නුඹලා සියල්ලම එක් රැස් කරන්නේය. ඇත්තෙන්ම අල්ලාහ්ට ඔහු අභිමත සියළු දේ කිරීමට බලය ඇත.

وَلِكُلٍّ وِّجۡهَةٌ هُوَ مُوَلِّيۡهَا فَاسۡتَبِقُوا الۡخَيۡرٰتِ ؕ اَيۡنَ مَا تَكُوۡنُوۡا يَاۡتِ بِكُمُ اللّٰهُ جَمِيۡعًا ؕ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَىۡءٍ قَدِيۡرٌ ﴿۱۴۹﴾

150. තවද ඔබ කොතැනකින් හෝ පිටවන්නේද, ඔබගේ මුහුණ ශුද්ධවූ නැමදුම් ස්ථානය දෙසට හරවන්න. මන්ද සැබැවින්ම එය ඔබගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යය වේ. තවද නුඹලා කරන දේ පිළිබඳව අල්ලාහ් නොසැළකිලිමත් නොවේ.

وَمِنۡ حَيۡثُ خَرَجۡتَ فَوَلِّ وَجۡهَكَ شَطۡرَ الۡمَسۡجِدِ الۡحَرَامِ ؕ وَاِنَّهٗ لَلۡحَقُّ مِنۡ رَّبِّكَ ؕ وَمَا اللّٰهُ بِغَافِلٍ عَمَّا تَعۡمَلُوۡنَ ﴿۱۵۰﴾

151. තවද ඔබ කොතැනකින් හෝ පිටවන්නේද, ඔබගේ මුහුණ ශුද්ධවූ නැමදුම් ස්ථානය දෙසට හරවන්න. තවද නුඹලා කොතැනක සිටියද, අසාධාරණ කළ අය හැර අන් ජනතාවට නුඹලාට එරෙහිව කිසිදු සාධකයක් නොවනු පිණිස ඒ දෙසට

وَمِنۡ حَيۡثُ خَرَجۡتَ فَوَلِّ وَجۡهَكَ شَطۡرَ الۡمَسۡجِدِ الۡحَرَامِ ؕ وَحَيۡثُ مَا كُنۡتُمۡ فَوَلُّوۡا وُجُوۡهَكُمۡ شَطۡرَهٗ ۙ لِئَلَّا يَكُوۡنَ لِلنَّاسِ

*සටහන. 147: “එය” යන වචනය මූලික වශයෙන් ශුද්ධවූ වක්තෘවරයාණන්ගේ (ඔහුට සාමය අත්වේවා) හැසිරීමෙහි දකින්නාවූ සත්‍යයෙහි සළකුණු ඔවුන්ට සාක්ෂි ලෙස පෙන්නුම් කරයි. ඔහු දෙවියන්ගේ ගුණාංගයන් පිළිඹිඹු කරන බැවින් ඔහු දේවාශිර්වාද ලත් පුද්ගලයෙකු ලෙස ඔප්පු වේ. ඔවුන්, ඔවුන්ගේ පුත්‍රයින් තුළ වූ චරිතයෙහි සළකුණු සහ මුද්‍රාව මගින් ඔවුන්ව හඳුනාගන්නා සේම ඔවුන් තමන්ට සත්‍ය වශයෙන්ම අයත් යැයි දනිති. එලෙසම දේවාශිර්වාද ලත් මිනිසෙකුව, ඔහුගේ හැසිරීම් සහ ජීවන රටාව තුළින් පෙන්නුම් කරන දේව ගුණාංගයන්ගෙන් හඳුනාගත යුතුය.

නුඹලාගේ මුහුණු හරවනු. එහෙයින් නුඹලා ඔවුනට බිය නොවනු, මා වෙතම බිය දක්වනු. තවද මා නුඹලාට මාගේ අනුග්‍රහය සම්පූර්ණ කරනු පිණිසද නුඹලා යහමග ලබනු පිණිසද වේ.

عَلَيْكُمْ حُجَّةٌ ۙ إِلَّا الَّذِينَ ظَلَمُوا مِنْهُمْ ۚ فَلَا تَخْشَوْهُمْ وَاخْشَوْنِي ۚ وَلِأُتِمَّ نِعْمَتِي عَلَيْكُمْ وَلَعَلَّكُمْ تَهْتَدُونَ ﴿١٥١﴾

152. (කෙසේදයත්) අපගේ සළකුණු නුඹලාට පෙන්වාදෙන්නාවූද, නුඹලාව පරිශුද්ධ කරන්නාවූද, නුඹලාට පුස්තකය හා ප්‍රඥාව උගන්වන්නාවූද නුඹලා නොදන්නා දේ නුඹලාට උගන්වන්නාවූද දූතයෙකු නුඹලා අතරෙන්ම නුඹලා වෙත අප එවූ පරිදිය.

كَمَا أَرْسَلْنَا فِيكُمْ رَسُولًا مِّنكُمْ يَتْلُوا عَلَيْكُمْ آيَاتِنَا وَيُزَكِّيكُمْ وَيُعَلِّمُكُمُ الْكِتَابَ وَالْحِكْمَةَ وَيُعَلِّمُكُم مَّا لَمْ تَكُونُوا تَعْلَمُونَ ﴿١٥٢﴾

معانقة ٣ عند المتأخرين

153. එබැවින් මා සිහි කරනු, මමද නුඹලාව සිහි කරන්නෙමි. තවද මා හට කෘතඥ වනු, තවද මා හට අකෘතඥ නොවනු.

فَاذْكُرُونِي أَذْكُرْكُمْ وَاشْكُرُوا لِي وَلَا تَكْفُرُونِ ﴿١٥٣﴾ ع ١٨ ٢

154. එම්බල විශ්වාසිතයිනි! ඉවසීමෙන් සහ යාච්ඤාවෙන් යුතුව පිහිට පතනු. නියතවශයෙන්ම අල්ලාහ් ඉවසිලිවන්තයින් සමග සිටින්නේය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا اسْتَعِينُوا بِالصَّبْرِ وَالصَّلَاةِ ۚ إِنَّ اللَّهَ مَعَ الصَّابِرِينَ ﴿١٥٤﴾

155. තවද අල්ලාහ්ගේ මාර්ගයෙහි ඝාතනය කරනු ලබන්නන්ට මියගියවුන් යැයි නොකියනු. නොඑසේය, ඔවුහු ජීවත්වන්නවුන් වෙති. එහෙත් නුඹලා වටහා නොගන්නෙහුය.

وَلَا تَقُولُوا لِمَن يُقْتَلُ فِي سَبِيلِ اللَّهِ أَمْوَاتٌ ۚ بَلْ أَحْيَاءٌ وَلَٰكِن لَّا تَشْعُرُونَ ﴿١٥٥﴾

156. තවද කිසියම් හිතියකින් හා කුසගින්නෙන්ද, ධනය, ජීවිත හා ඵලදාව යනාදියේ හානියෙන්ද අපි නුඹලාව නියතවශයෙන්ම පිරික්සන්නෙමු. නමුත් ඉවසිලිවන්තයින් හට ශුභාරංචි දෙනු.

وَلَنَبْلُوَنَّكُم بِشَيْءٍ مِّنَ الْخَوْفِ وَالْجُوعِ وَنَقْصٍ مِّنَ الْأَمْوَالِ وَالْأَنفُسِ وَالثَّمَرَاتِ ۗ وَبَشِّرِ الصَّابِرِينَ ﴿١٥٦﴾

الَّذِيْنَ اِذَآ اَصَابَتْهُمْ مُّصِيْبَةٌ ۙ قَالُوْٓا اِنَّا لِلّٰهِ وَاِنَّآ اِلَيْهِ رٰجِعُوْنَ ۗ ﴿۱۵۷﴾

157. එවන් අයට විපතක් සිදුවන කල්හි 'ඇත්තෙන්ම අප අල්ලාහ්ටම අයත්ය. තවද අප ආපසු යා යුත්තේ ඔහු වෙතටමයැ'යි පවසන්නෝය.

اُولٰٓئِكَ عَلَيْهِمْ صَلَوٰتٌ مِّنْ رَّبِّهِمْ وَرَحْمَةٌ ۟ وَاُولٰٓئِكَ هُمُ الْمُهْتَدُوْنَ ﴿۱۵۸﴾

158. තමන්ගේ අධිපතියාණන්ගෙන් ආශිර්වාදය සහ දයාව ලබන්නෝ මොවුහුමය. එමෙන්ම යහමග යවනු ලබන්නෝ ද මොවුහුමය.

اِنَّ الصَّفَا وَالْمَرْوَةَ مِنْ شَعَآئِرِ اللّٰهِ ۚ فَمَنْ حَجَّ الْبَيْتَ اَوِ اعْتَمَرَ فَلَا جُنَاحَ عَلَيْهِ اَنْ يَّطَّوَّفَ بِهِمَا ۗ وَمَنْ تَطَوَّعَ خَيْرًا ۙ فَاِنَّ اللّٰهَ شَاكِرٌ عَلِيْمٌ ﴿۱۵۹﴾

159. ඇත්තෙන්ම සෆා සහ මර්වාහ් අල්ලාහ්ගේ සළකුණු අතර වේ. එබැවින් යමෙකු එම නිවස වෙත හජ් වන්දනාව හෝ උම්රාහ් ඉටු කරන්නේද ඔහුට මේ දෙක (සෆා හා මර්වාහ්) වටා ගමන් කිරීම වරදක් නොමැත. තවද කවුරුන් හෝ අනිවාර්ය කළ දෙයටත් අමතරව යහකම් කරන්නේද, එවිට නියතවශයෙන්ම අල්ලාහ් අගය කරන්නාය. සියල්ල දන්නාය.

اِنَّ الَّذِيْنَ يَكْتُمُوْنَ مَآ اَنْزَلْنَا مِنَ الْبَيِّنٰتِ وَالْهُدٰى مِنْۢ بَعْدِ مَا بَيَّنّٰهُ لِلنَّاسِ فِى الْكِتٰبِ ۙ اُولٰٓئِكَ يَلْعَنُهُمُ اللّٰهُ وَيَلْعَنُهُمُ اللّٰعِنُوْنَ ۙ ﴿۱۶۰﴾

160. අප පහළ කර ඇති සළකුණු සහ මගපෙන්වීම අප මිනිසුන්ට එය ග්‍රන්ථයෙහි පැහැදිලි කළ පසුවද, එය සඟවන අයට අල්ලාහ් ශාප කරන්නේය. (එලෙසම) ශාප කරන්නාවූ අයද ඔවුනට ශාප කරන්නෝය.

اِلَّا الَّذِيْنَ تَابُوْا وَاَصْلَحُوْا وَبَيَّنُوْا فَاُولٰٓئِكَ اَتُوْبُ عَلَيْهِمْ ۚ وَاَنَا التَّوَّابُ الرَّحِيْمُ ﴿۱۶۱﴾

161. එහෙත් යමෙකු පසුතැවිලි වෙමින්ද නිවැරදි කරගනිමින්ද විවෘතව (සත්‍යය) ප්‍රකාශ කරන්නේද, එවැන්නන් වෙතට මම ක්ෂමාවෙන් යුතුව හැරෙන්නෙමි. තවද මම (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නෙමි, (තවද) පරම දයාබර වෙමි.

اِنَّ الَّذِيْنَ كَفَرُوْا وَمَاتُوْا وَهُمْ كُفَّارٌ

162. අවිශ්වාස කරන අය, ඔවුන් අවිශ්වාසිතයින්ව සිටියදීම මිය යන්නේද, ඔවුන් හට අල්ලාහ්ගේද

أُولَٰٓئِكَ عَلَيْهِمْ لَعْنَةُ اللَّهِ وَالْمَلَٰٓئِكَةِ
وَالنَّاسِ أَجْمَعِينَ ﴿١٦٢﴾

සුරදූතයින්ගේද මිනිසුන් ඇතුළු සියල්ලන්ගේද ශාපය වේ.

خَٰلِدِينَ فِيهَا ۖ لَا يُخَفَّفُ عَنْهُمُ الْعَذَابُ
وَلَا هُمْ يُنظَرُونَ ﴿١٦٣﴾

163. ඔවුහු එහි ම රැඳී සිටින්නෝය. ඔවුන්ට දඬුවමද ලිහිල් නොකරනු ලබන්නේය. ඔවුන්ට කාල අවකාශයද දෙනු නොලබන්නේය.

وَإِلَٰهُكُمْ إِلَٰهٌ وَاحِدٌ ۖ لَّآ إِلَٰهَ إِلَّا هُوَ
الرَّحْمَٰنُ الرَّحِيمُ ﴿١٦٤﴾ ع

164. තවද නුඹලාගේ දෙවියා එකම දෙවියාය, ඔහු හැර වෙනත් දෙවියෙකු නොමැත, මහා කාරුණිකය. පරම දයාබරය.

إِنَّ فِي خَلْقِ السَّمَٰوَٰتِ وَالْأَرْضِ
وَاخْتِلَٰفِ الَّيْلِ وَالنَّهَارِ وَالْفُلْكِ الَّتِي
تَجْرِي فِي الْبَحْرِ بِمَا يَنفَعُ النَّاسَ وَمَآ
أَنزَلَ اللَّهُ مِنَ السَّمَآءِ مِن مَّآءٍ فَأَحْيَا بِهِ
الْأَرْضَ بَعْدَ مَوْتِهَا وَبَثَّ فِيهَا مِن كُلِّ
دَآبَّةٍ ۖ وَّ تَصْرِيفِ الرِّيَٰحِ وَالسَّحَابِ
الْمُسَخَّرِ بَيْنَ السَّمَآءِ وَالْأَرْضِ لَأَيَٰتٍ
لِّقَوْمٍ يَعْقِلُونَ ﴿١٦٥﴾

165. නිශ්චිතවම අහස් සහ පොළොව නිර්මාණයෙහිද, රැය සහ දවාල මාරුවීමෙහිද, මිනිසුන් හට ප්‍රතිලාභ ගෙන දෙන්නාවූ දේ සමග මුහුදෙහි යාත්‍රා කරන්නාවූ නැව්හිද, වළාකුලින් අල්ලාහ් ජලය පහළ කර එමගින්, පොළොව එහි අභාවයෙන් පසු (එය) ප්‍රාණවත් කරමින්, එහි සියලුම වර්ගයේ ජිවීන් විසිරුවා හැරීමෙහිද, සුළඟ වෙනස් කරවීමෙහිද, අහස සහ පොළොව අතර සේවය සඳහා යොදවා ඇති වළාකුළුවෙහිද ඇත්තෙන්ම වටහාගන්නා ජනතාවට සළකුණු ඇත.

وَمِنَ النَّاسِ مَن يَتَّخِذُ مِن دُونِ اللَّهِ
أَندَادًا يُحِبُّونَهُمْ كَحُبِّ اللَّهِ ۖ وَالَّذِينَ
ءَامَنُوٓا أَشَدُّ حُبًّا لِّلَّهِ ۗ وَلَوْ يَرَى الَّذِينَ
ظَلَمُوٓا إِذْ يَرَوْنَ الْعَذَابَ ۙ أَنَّ الْقُوَّةَ لِلَّهِ

166. තවද අල්ලාහ් හැර වෙනත් දේවල් නැමදුම් කිරීමට ගන්නා සමහරෙක් මිනිසුන් අතර වෙති. අල්ලාහ්ට දැක්විය යුතු ආදරය මෙන් ආදරය ඒවාට දක්වන්නෝය. එහෙත් විශ්වාස කරන්නන් අල්ලාහ්ට ඇති (ඔවුන්ගේ) ආදරයෙහි ඉතා දැඩිය. සීමාව ඉක්මවූ ඔවුන් දඬුවම දකින (මොහොත දැන්) දැකගන්නේ නම්, සියළු බලය අල්ලාහ් සතු බවද

جَمِيْعًا ۙ وَّاَنَّ اللّٰهَ شَدِيْدُ الْعَذَابِ ﴿١٦٦﴾

එමෙන්ම දඬුවම් දීමෙහි අල්ලාහ් ඉතා දැඩි බවද (වටහා ගන්නෝය).

اِذْ تَبَرَّاَ الَّذِيْنَ اتُّبِعُوْا مِنَ الَّذِيْنَ اتَّبَعُوْا وَرَاَوُا الْعَذَابَ وَتَقَطَّعَتْ بِهِمُ الْاَسْبَابُ ﴿١٦٧﴾

167. (ඇත්තෙන්ම) අනුගමනය කරනු ලැබූ අය දඬුවම දකිමින්ද, ඔවුන්ගේ සියළු සම්බන්ධතා සිඳලමින්ද තම අනුගාමිකයින්ව අයිති කර නොගන්නා කල්හි (එම අවස්ථාව ඔවුන් දකින්නේ නම් නිශ්චිතවම ඔවුන් වටහාගනු ඇත).

وَقَالَ الَّذِيْنَ اتَّبَعُوْا لَوْ اَنَّ لَنَا كَرَّةً فَنَتَبَرَّاَ مِنْهُمْ كَمَا تَبَرَّءُوْا مِنَّا ؕ كَذٰلِكَ يُرِيْهِمُ اللّٰهُ اَعْمَالَهُمْ حَسَرٰتٍ عَلَيْهِمْ ؕ وَمَا هُمْ بِخٰرِجِيْنَ مِنَ النَّارِ ﴿١٦٨﴾

168. තවද අනුගමනය කළ අය, 'අපට ආපසු යෑමට පමණක් ලැබුනේ නම්, මොවුන් අපව අත හැර දැමූ පරිද්දිම අපිද මොවුන්ව අත හැර දමන්නෙමු'යි කියන්නෝය. මෙලෙසම අල්ලාහ් ඔවුනට ඔවුන්ගේ ක්‍රියාවන් ඔවුනට දුක් කම්කටොළු ලෙස පෙන්වන්නේය. තවද ඔවුහු නිරාගින්නෙන් පිට නොවන්නෝය.

يٰۤاَيُّهَا النَّاسُ كُلُوْا مِمَّا فِى الْاَرْضِ حَلٰلًا طَيِّبًا ۖ وَّلَا تَتَّبِعُوْا خُطُوٰتِ الشَّيْطٰنِ ؕ اِنَّهٗ لَكُمْ عَدُوٌّ مُّبِيْنٌ ﴿١٦٩﴾

*169. එම්බල මිනිසුනි! පොළොවෙහි ඇති දෙයින් නිත්‍යානුකූල සහ ගුණදායක දේ අනුභව කරනු. තවද ෂෙයිතාන්ගේ අඩිපාර අනුගමනය නොකරනු. නියතවශයෙන්ම ඔහු නුඹලාට විවෘත සතුරෙකි.

اِنَّمَا يَاْمُرُكُمْ بِالسُّوْٓءِ وَالْفَحْشَآءِ وَاَنْ تَقُوْلُوْا عَلَى اللّٰهِ مَا لَا تَعْلَمُوْنَ ﴿١٧٠﴾

170. ඔහු, නරක දේ මෙන්ම පිළිකුල් දේ සහ අල්ලාහ් පිළිබඳව නුඹලා නොදත් දේ කීමට පමණක් නුඹලාට අණ කරන්නේය.

وَاِذَا قِيْلَ لَهُمُ اتَّبِعُوْا مَآ اَنْزَلَ اللّٰهُ قَالُوْا بَلْ نَتَّبِعُ مَآ اَلْفَيْنَا عَلَيْهِ اٰبَآءَنَا ؕ اَوَلَوْ كَانَ

171. තවද 'අල්ලාහ් පහළ කර ඇති දේ අනුගමනය කරනු'යි ඔවුනට පවසනු ලැබූ කල්හි, 'නොඑසේය, අපි අපගේ මුතුන්මිත්තන් තුළ දුටු දැයම

*සටහන. 169: "තය්යිබ්" ( طَيِّبْ ) යන වචනය, නිත්‍යානුකූල යැයි හැඳින්වූ දෙයක් වන අතර පුද්ගලික කැමැත්ත සහ ගුණදායක භාවය යන දෙකටම යෙදිය හැකිය. පළමු අවස්ථාව ගත්විට, එකම ආහාරය නිත්‍යානුකූල වුවද තේරීමෙහි විවිධත්වයද රසයද අවස්ථාව අනුව කෙනෙකුට ගුණදායක වන අතර තවත් කෙනෙකුට ගුණදායක නොවනු ඇත. මෙහි දෙවන අවස්ථාව ගත් කළ, එය ආහාරයෙහි තත්ත්වය පෙන්නුම් කරන අතර විශ්වාසිතයින් නිත්‍යානුකූල පමණක් නොව එමෙන්ම යහපත් වූද සෞඛ්‍යදායි වූද ගුණදායක වූද තත්ත්වයෙහි තිබෙන්නාවූ ආහාර අනුභව කිරීමට ප්‍රිය කරති.

أَبَآؤُهُمْ لَا يَعْقِلُوْنَ شَيْـًٔا وَّلَا يَهْتَدُوْنَ ﴿١٧١﴾

අනුගමනය කරන්නෙමු'යි ඔවුහු කියති. 'කිමද! ඔවුන්ගේ පියවරුන්ට කිසිඳු නුවණක් නොමැතිව සහ ඔවුන් යහමාර්ගයෙහි නොසිටියා වුවද?'

وَمَثَلُ الَّذِيْنَ كَفَرُوْا كَمَثَلِ الَّذِىْ يَنْعِقُ
بِمَا لَا يَسْمَعُ اِلَّا دُعَآءً وَّنِدَآءً ؕ صُمٌّۢ
بُكْمٌ عُمْىٌ فَهُمْ لَا يَعْقِلُوْنَ ﴿١٧٢﴾

172. තවද අවිශ්වාස කළවුන්ගේ තත්ත්වය කෙසේදයත්, කිසිවක් නෑසෙන්නාවූ දෙයකට කෑගසන්නාගේ තත්ත්වයට සමාන වේ. එය හුදෙක් අඬගැසීමක් හා වැලපීමක් පමණි. (ඔවුන්) බිහිරි, ගොළු (සහ) අන්ධ වෙති. එබැවින් ඔවුහු වටහා නොගනිති.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا كُلُوْا مِنْ طَيِّبٰتِ
مَا رَزَقْنٰكُمْ وَاشْكُرُوْا لِلّٰهِ اِنْ كُنْتُمْ
اِيَّاهُ تَعْبُدُوْنَ ﴿١٧٣﴾

173. එම්බල විශ්වාසිතයිනි! අපි නුඹලාට සැපයූ හොඳ දෙයින් අනුභව කරනු. තවද අල්ලාහ්ට ස්තුති කරනු. නුඹලා ඔහුටම නමදින්නේ නම්!.

اِنَّمَا حَرَّمَ عَلَيْكُمُ الْمَيْتَةَ وَالدَّمَ وَلَحْمَ
الْخِنْزِيْرِ وَمَآ اُهِلَّ بِهٖ لِغَيْرِ اللّٰهِ ۚ فَمَنِ
اضْطُرَّ غَيْرَ بَاغٍ وَّلَا عَادٍ فَلَآ اِثْمَ
عَلَيْهِ ؕ اِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿١٧٤﴾

174. ඔහු (අල්ලාහ්) නුඹලාට නීතියෙන් තහනම් කර ඇත්තේ ඉබේම මළ ඒවාද, රුධිරයද, සූකර මාංශද, අල්ලාහ් හැර අන් දෙයක නාමය යදින ලද දේවල්ද පමණක් වේ. නමුත් කෙනෙකු අකීකරු නොවෙමින් සීමාව නොඉක්මවමින්ද සිටින කල්හි ඔහු උග්‍ර අවශ්‍යතාවයකට හසුවූයේ නම් ඔහුට පවක් නැත. ඇත්තෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය. පරම දයාබරය.

اِنَّ الَّذِيْنَ يَكْتُمُوْنَ مَآ اَنْزَلَ اللّٰهُ مِنَ
الْكِتٰبِ وَيَشْتَرُوْنَ بِهٖ ثَمَنًا قَلِيْلًا ۙ
اُولٰٓئِكَ مَا يَاْكُلُوْنَ فِىْ بُطُوْنِهِمْ اِلَّا
النَّارَ وَلَا يُكَلِّمُهُمُ اللّٰهُ يَوْمَ الْقِيٰمَةِ
وَلَا يُزَكِّيْهِمْ ۖۚ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿١٧٥﴾

175. පුස්තකයෙහි අල්ලාහ් පහළ කළ දේ සඟවා, එය ඉතා අල්ප මිලකට හුවමාරු කරන්නන්, තමන්ගේ කුසයන් ගින්නෙන්ම ඔවුහු පුරවා ගනිති. තවද පුනරුත්ථාන දිනයේදී අල්ලාහ් ඔවුන් සමග කථා නොකරන්නේය. තවද ඔහු ඔවුන්ව පවිත්‍ර නොකරන්නේය. තවද ඔවුන්ට වේදනීය දඬුවමක් ඇත.

أُولَٰٓئِكَ الَّذِينَ اشْتَرَوُا الضَّلَٰلَةَ بِالْهُدَىٰ وَالْعَذَابَ بِالْمَغْفِرَةِ ۚ فَمَآ أَصْبَرَهُمْ عَلَى النَّارِ ﴿١٧٦﴾

176. යහමග වෙනුවට වැරදිමගද, ක්ෂමාව වෙනුවට දඬුවමද හුවමාරු කලවුන් මොවුහුම වෙති. නිරාගින්න කෙරෙහි ඔවුන්ගේ දරා සිටීමේ ශක්තිය කෙතරම් ආශ්චර්යමත්ද?

ذَٰلِكَ بِأَنَّ اللَّهَ نَزَّلَ الْكِتَٰبَ بِالْحَقِّ ۗ وَإِنَّ الَّذِينَ اخْتَلَفُوا فِي الْكِتَٰبِ لَفِي شِقَاقٍ بَعِيدٍ ﴿١٧٧﴾

177. එයට හේතුව වන්නේ අල්ලාහ් ග්‍රන්ථය සත්‍යය සමග පහළ කළ නිසාය. තවද මෙම ග්‍රන්ථය පිළිබඳව එකඟ නොවන ඔවුන් නියත වශයෙන්ම සතුරුකමෙහි බොහෝ දුර ගොස් ඇත.

لَّيْسَ الْبِرَّ أَن تُوَلُّوا وُجُوهَكُمْ قِبَلَ الْمَشْرِقِ وَالْمَغْرِبِ وَلَٰكِنَّ الْبِرَّ مَنْ ءَامَنَ بِاللَّهِ وَالْيَوْمِ الْءَاخِرِ وَالْمَلَٰٓئِكَةِ وَالْكِتَٰبِ وَالنَّبِيِّۦنَ ۚ وَءَاتَى الْمَالَ عَلَىٰ حُبِّهِۦ ذَوِي الْقُرْبَىٰ وَالْيَتَٰمَىٰ وَالْمَسَٰكِينَ وَابْنَ السَّبِيلِ وَالسَّآئِلِينَ وَفِي الرِّقَابِ ۚ وَأَقَامَ الصَّلَوٰةَ وَءَاتَى الزَّكَوٰةَ ۚ وَالْمُوفُونَ بِعَهْدِهِمْ إِذَا عَٰهَدُوا ۚ وَالصَّٰبِرِينَ فِي الْبَأْسَآءِ وَالضَّرَّآءِ وَحِينَ الْبَأْسِ ۗ أُولَٰٓئِكَ الَّذِينَ صَدَقُوا ۖ وَأُولَٰٓئِكَ هُمُ الْمُتَّقُونَ ﴿١٧٨﴾

178. නැගෙනහිරට හෝ බටහිරට හෝ නුඹලා තමන්ගේ මුහුණ හැරවීම ධාර්මිෂ්ඨභාවය නොවේ. නමුත් (සැබෑ) ධාර්මිෂ්ඨකයකු නම් ඔහු අල්ලාහ් කෙරෙහිද, අවසන් දිනය කෙරෙහිද, සුරදූතයින් කෙරෙහිද, ග්‍රන්ථය කෙරෙහිද, වක්තෘවරුන් කෙරෙහිද විශ්වාස කර ඔහුට (අල්ලාහ්ට) ඇති ආදරය හේතුවෙන් තම ධනය ඥාතීන්ටද, අනාථයින්ටද, දිළිඳුන්ටද, මගියන්ටද, (පින් පිණිස) යදින්නන්ටද, සිරගතවූවන් (වෙනුවෙන් වන්දිගෙවීම)ටද, වැය කරමින් තවද නැමදුමෙහි නිරත වෙමින්, සැකාත්ද (දුගී බද්ද) ගෙවයි. තවද ඔවුන් පොරොන්දුවක් දුන් විට එය ඉෂ්ට කරමින්, දිළිඳුකමෙහිදීද, විපතෙහිදීද, යුධ සමයෙහිදීද (ස්ථිරසාරව) ඉවසිලිවන්ත වන්නන්ය. තවද සත්‍ය තහවුරු කළ අය මොවුහුම වෙති. එමෙන්ම දෙවියන් කෙරෙහි බිය ඇත්තන්ද මොවුහුම වෙති.

*179. එම්බල විශ්වාසිතයිනි! ඝාතනයන් (සම්බන්ධයෙන් සාධාරණව) එකටෙක කිරීමට නුඹලාට නියම කරන ලදී. නිදහස් පුද්ගලයෙකුට නිදහස් පුද්ගලයාද, වහලෙකුට වහලාද, ස්ත්‍රියකට ස්ත්‍රියද වේ. නමුත් (ඝාතනය කළ) ඔහුට (ඝාතනයට ලක්වූ) කෙනෙකුගේ සොහොයුරා ක්ෂමාව දුන්නේ නම් (වන්දි මුදලක් වශයෙන් ලබාගැනීමට) ක්‍රියා කිරීමේදී එය සාධාරණව කළ යුතුය. තවද (ඝාතකයා) ඉතා සතුටුදායක අන්දමින් වන්දි මුදල ඔහුට ගෙවිය යුතු වේ. මෙය නුඹලාගේ අධිපතියාණන්ගෙන් වන සහනයක් මෙන්ම දයාවක්ද වේ. ඉන් පසුවද යම් කිසිවෙකු සීමාව ඉක්මවන්නේ නම්, ඔහුට වේදනිය දඬුවමක් ඇත.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ كُتِبَ عَلَيْكُمُ ٱلْقِصَاصُ فِى ٱلْقَتْلَى ۖ ٱلْحُرُّ بِٱلْحُرِّ وَٱلْعَبْدُ بِٱلْعَبْدِ وَٱلْأُنثَىٰ بِٱلْأُنثَىٰ ۚ فَمَنْ عُفِىَ لَهُۥ مِنْ أَخِيهِ شَىْءٌ فَٱتِّبَاعٌۢ بِٱلْمَعْرُوفِ وَأَدَآءٌ إِلَيْهِ بِإِحْسَٰنٍ ۗ ذَٰلِكَ تَخْفِيفٌ مِّن رَّبِّكُمْ وَرَحْمَةٌ ۗ فَمَنِ ٱعْتَدَىٰ بَعْدَ ذَٰلِكَ فَلَهُۥ عَذَابٌ أَلِيمٌ ﴿١٧٩﴾

180. තවද එම්බල වටහාගන්නා මිනිසුනි! එකටෙක කිරීමේ (නීතියෙහි) නුඹලාට ජීවිතය ඇත, එය නුඹලාට සුරක්ෂිතභාවය භුක්ති විඳිනු පිණිසය.

وَلَكُمْ فِى ٱلْقِصَاصِ حَيَوٰةٌ يَٰٓأُو۟لِى ٱلْأَلْبَٰبِ لَعَلَّكُمْ تَتَّقُونَ ﴿١٨٠﴾

181. නුඹලාගෙන් කෙනෙකුට මරණය පැමිණෙනවිට, ඔහු බොහෝ වස්තුව හැර යන්නේ නම්, (ඔහු) දෙමාපියන්ටද, සමීප ඥාතීන්ටද, සාධාරණයෙන් කටයුතු කරනු පිණිස අවසන් කැමැත්ත (ප්‍රකාශ කිරීම) නුඹලාට නියම කොට ඇත. (මෙය) දෙවියන් කෙරෙහි බිය දක්වන්නන් සඳහා වන යුතුකමකි.

كُتِبَ عَلَيْكُمْ إِذَا حَضَرَ أَحَدَكُمُ ٱلْمَوْتُ إِن تَرَكَ خَيْرًا ٱلْوَصِيَّةُ لِلْوَٰلِدَيْنِ وَٱلْأَقْرَبِينَ بِٱلْمَعْرُوفِ ۖ حَقًّا عَلَى ٱلْمُتَّقِينَ ﴿١٨١﴾

182. තවද යම් කිසිවෙක් එයට සවන් දුන් පසුව එය වෙනස් කරන්නේ නම්, එහි පාපය නියතවශයෙන්ම එය වෙනස් කළ අය මතය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දන්නාය.

فَمَنۢ بَدَّلَهُۥ بَعْدَمَا سَمِعَهُۥ فَإِنَّمَآ إِثْمُهُۥ عَلَى ٱلَّذِينَ يُبَدِّلُونَهُۥٓ ۚ إِنَّ ٱللَّهَ سَمِيعٌ عَلِيمٌ ﴿١٨٢﴾

183. නමුත් යමෙක් අවසන් කැමැත්ත ප්‍රකාශ කරන්නාගෙන්

فَمَنْ خَافَ مِن مُّوصٍ جَنَفًا أَوْ إِثْمًا

*සටහන. 179: "ෆමන් උෆිය" (فَمَنْ عُفِيَ) සිට "බිඉහ්සාන්" (بِإِحْسَانٍ) දක්වා යන වාක්‍යයෙන් එම වන්දි මුදල් තීරණය කිරීමේදී ඉතා සාධාරණව සහ උදාර ලෙස තීරණය කර ඝාතනයට ලක්වූ අයගේ ඥාතීන්ට ගෙවිය යුතුයි යන අර්ථය ගෙන දෙයි.

فَاَصۡلَحَ بَيۡنَهُمۡ فَلَاۤ اِثۡمَ عَلَيۡهِ ؕ اِنَّ اللّٰهَ غَفُوۡرٌ رَّحِيۡمٌ ﴿١٨٣﴾

පක්ෂපාතිත්වයක් හෝ වරදක් ගෙන බිය වී, තවද ඔවුන් (ඒ හා සම්බන්ධ පිරිස්) අතර සමාදානය ඇතිකරන්නේ නම් ඔහුට කිසිඳු පවක් නොවනු ඇත. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය. දයානුකම්පිතය.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا كُتِبَ عَلَيۡكُمُ الصِّيَامُ كَمَا كُتِبَ عَلَى الَّذِيۡنَ مِنۡ قَبۡلِكُمۡ لَعَلَّكُمۡ تَتَّقُوۡنَۙ ﴿١٨٤﴾

184. එම්බල විශ්වාසිතයිනි! නුඹලාට පෙර සිටි අයට උපවාසය නියම කළ පරිදිම නුඹලාටද උපවාසය නියම කොට ඇත. එය නුඹලා බිය බැතිමත් වනු පිණිසය.

اَيَّامًا مَّعۡدُوۡدٰتٍ ؕ فَمَنۡ كَانَ مِنۡكُمۡ مَّرِيۡضًا اَوۡ عَلٰى سَفَرٍ فَعِدَّةٌ مِّنۡ اَيَّامٍ اُخَرَ ؕ وَعَلَى الَّذِيۡنَ يُطِيۡقُوۡنَهٗ فِدۡيَةٌ طَعَامُ مِسۡكِيۡنٍ ؕ فَمَنۡ تَطَوَّعَ خَيۡرًا فَهُوَ خَيۡرٌ لَّهٗ ؕ وَاَنۡ تَصُوۡمُوۡا خَيۡرٌ لَّكُمۡ اِنۡ كُنۡتُمۡ تَعۡلَمُوۡنَ ﴿١٨٥﴾

185. (නියම කරන ලද උපවාසය) නියමිත දින ගණනකටය. නමුත් නුඹලා අතරින් යම් කිසිවෙකු රෝගාතුර වේ නම් හෝ ගමනක යෙදී සිටී නම් හෝ සමාන දින ගණනක් අන් දිනවල (උපවාසය යෙදිය යුතුය). තවද දැඩි දුෂ්කරතාවයෙන් (පමණක්) උපවාසය ඉටු කළ හැකි අයට ප්‍රතිකර්මයක් නම් දිළින්දෙකුට ආහාර දීම වේ. තවද කවුරුන් හෝ සිය කැමැත්තෙන්ම කීකරු වී යහපත් ක්‍රියාවක් කරන්නේ නම්, ඔහුට එය වඩාත් යහපත්ය. තවද නුඹලා දැන සිටියේ නම්, උපවාසයේ යෙදීම නුඹලාට වඩාත් යහපත්ය.

شَهۡرُ رَمَضَانَ الَّذِىۡۤ اُنۡزِلَ فِيۡهِ الۡقُرۡاٰنُ هُدًى لِّلنَّاسِ وَبَيِّنٰتٍ مِّنَ الۡهُدٰى وَالۡفُرۡقَانِ ۚ فَمَنۡ شَهِدَ مِنۡكُمُ الشَّهۡرَ فَلۡيَـصُمۡهُ ؕ وَمَنۡ كَانَ مَرِيۡضًا اَوۡ عَلٰى سَفَرٍ فَعِدَّةٌ مِّنۡ اَيَّامٍ اُخَرَ ؕ يُرِيۡدُ اللّٰهُ بِكُمُ الۡيُسۡرَ وَلَا يُرِيۡدُ بِكُمُ الۡعُسۡرَ وَلِتُكۡمِلُوا الۡعِدَّةَ وَلِتُكَبِّرُوا اللّٰهَ عَلٰى مَا

186. රමලාන් මාසය එහි අල්-කුර්ආනය පහළ කරන ලදී. එය මනුෂ්‍ය වර්ගයාට මගපෙන්වීමක්ද මගපෙන්වීමෙහි පැහැදිලි සාධක සමඟ වෙන්කර හඳුනාගැනීමක්ද වේ. එබැවින් එම මාසය නුඹලාගෙන් කවරෙකු හෝ ලබන්නේ නම් ඔහු එහි උපවාසයේ යෙදිය යුතුවේ. එහෙත් යම් කිසිවෙකු රෝගාතුර වේ නම් හෝ ගමනක යෙදී සිටී නම් හෝ සමාන දින ගණනක් වෙනත් දිනයන්හිදී (උපවාසය යෙදිය යුතු වේ). අල්ලාහ් නුඹලාට පහසුතාවය පතන අතර ඔහු නුඹලාට අපහසුතාවය නොපතන්නේ, නුඹලා ගණන සම්පූර්ණ කරනු පිණිසද, ඔහු නුඹලාට යහමග පෙන්වූ

هَدٰىكُمْ وَلَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿١٨٦﴾

හෙයින් නුඹලා අල්ලාහ්ගේ ශ්‍රේෂ්ඨත්වය ප්‍රකාශ කරනු පිණිසද, නුඹලා කෘතඥ වනු පිණිසද වේ.

وَاِذَا سَاَلَكَ عِبَادِىْ عَنِّىْ فَاِنِّىْ قَرِيْبٌ ؕ اُجِيْبُ دَعْوَةَ الدَّاعِ اِذَا دَعَانِ ۙ فَلْيَسْتَجِيْبُوْا لِىْ وَلْيُؤْمِنُوْا بِىْ لَعَلَّهُمْ يَرْشُدُوْنَ ﴿١٨٧﴾

187. තවද මාගේ දාසයින් මා පිළිබඳව ඔබගෙන් විමසන විට, (පවසන්න) 'මා සමීපයෙහි සිටිමි. අයදින්නා මට යාච්ඤා කරන විට, මම ඔහුගේ යාච්ඤාවට පිළිතුරු දෙන්නෙමි. එබැවින් ඔවුහු මට සවන් දී ඔවුහු මා කෙරෙහි විශ්වාස කළ යුතුවේ. එය ඔවුන්ට හරිමග අනුගමනය කරනු පිණිසය.

اُحِلَّ لَكُمْ لَيْلَةَ الصِّيَامِ الرَّفَثُ اِلٰى نِسَآئِكُمْ ؕ هُنَّ لِبَاسٌ لَّكُمْ وَاَنْتُمْ لِبَاسٌ لَّهُنَّ ؕ عَلِمَ اللّٰهُ اَنَّكُمْ كُنْتُمْ تَخْتَانُوْنَ اَنْفُسَكُمْ فَتَابَ عَلَيْكُمْ وَعَفَا عَنْكُمْ ۚ فَالْـٰٔنَ بَاشِرُوْهُنَّ وَابْتَغُوْا مَا كَتَبَ اللّٰهُ لَكُمْ ۠ وَكُلُوْا وَاشْرَبُوْا حَتّٰى يَتَبَيَّنَ لَكُمُ الْخَيْطُ الْاَبْيَضُ مِنَ الْخَيْطِ الْاَسْوَدِ مِنَ الْفَجْرِ ۠ ثُمَّ اَتِمُّوا الصِّيَامَ اِلَى الَّيْلِ ۚ وَلَا تُبَاشِرُوْهُنَّ وَاَنْتُمْ عٰكِفُوْنَ ۙ فِى الْمَسٰجِدِ ؕ تِلْكَ حُدُوْدُ اللّٰهِ فَلَا تَقْرَبُوْهَا ؕ كَذٰلِكَ يُبَيِّنُ اللّٰهُ اٰيٰتِهٖ لِلنَّاسِ لَعَلَّهُمْ يَتَّقُوْنَ ﴿١٨٨﴾

*188. උපවාස රාත්‍රියෙහිදී නුඹලාගේ භාර්යාවන් වෙත යාම නුඹලාට නීතියෙන් අනුමත කරන ලදී. ඔවුහු නුඹලාට වස්ත්‍රයක් වන අතර නුඹලාද ඔවුන්ට වස්ත්‍රයක් වන්නෙහුය. නුඹලා නුඹලාට අසාධාරණයක් වන පරිදි කටයුතු කරමින් සිටි ආකාරය අල්ලාහ් දනියි. එබැවින් ඔහු දයාවෙන් යුතුව නුඹලා වෙතට අවධානය යොමු කරමින් නුඹලාට සහන සැලැස්සුවේය. එබැවින් දැන් නුඹලා ඔවුන් වෙතට ගොස් අල්ලාහ් නුඹලාට නියම කොට ඇති දේ ලබාගනු. තවද හිමිදිරියේ කළුවෙන් සුදු කිරණ නුඹලාට පැහැදිලිව වෙන්ව පෙනෙන තෙක් අනුභව කරනු, පානය කරනු. පසුව රාත්‍රිය එළඹෙන තෙක් උපවාසය සම්පූර්ණ කරනු. තවද නුඹලා කැපකිරීම (ඉඃතිකාෆ්) සඳහා නැමදුම් ස්ථානයන්හි රැඳී සිටින අතරතුරදී ඔවුන් වෙත නොයනු. අල්ලාහ් ගේ (නියම කළාවූ) සීමාවන් මේවාය. එබැවින් ඒවාට ළඟා නොවනු. මෙයාකාරයට ඔවුන් නපුරෙන් ආරක්ෂා වනු පිණිස අල්ලාහ් ඔහුගේ විධානයන් මිනිසුන් හට පැහැදිලි කරන්නේය.

*සටහන. 188: ඇත්තෙන්ම සුදු කිරණ හිමිදිරිය හා බැඳී ඇත. එබැවින් මෙහි තේරුම වනුයේ හිමිදිරියේ සුදු කිරණ රාත්‍රියේ කළුවෙන් පැහැදිලිව වෙන්ව පෙනෙන තෙක් යන්නයි.

*189. තවද නුඹලා අතර නුඹලාගේම වස්තුව වැරදි මාර්ගයෙන් ගිල නොදමනු. තවද නුඹලා දැනුවත්වම (අන්) ජනතාවගේ වස්තුවෙන් කොටසක් අසාධාරණ ලෙස ගිල දමනු පිණිස එය බලධාරීන් වෙත (අල්ලසක් ලෙස) නොදෙනු.

وَلَا تَأْكُلُوٓا أَمْوَالَكُم بَيْنَكُم بِالْبَاطِلِ وَتُدْلُوا بِهَآ إِلَى الْحُكَّامِ لِتَأْكُلُوا فَرِيقًا مِّنْ أَمْوَالِ النَّاسِ بِالْإِثْمِ وَأَنتُمْ تَعْلَمُونَ ﴿١٨٩﴾

190. ඔවුහු ඔබගෙන් නව සඳවල් ගැන අසති. 'ඒවා කාලය මැනීමේ ක්‍රමයක් ලෙස මනුෂ්‍ය වර්ගයාගේ (පොදු යහපත) සඳහාද, හජ් වන්දනාව සඳහාද වේයැ'යි පවසන්න. තවද නුඹලා නිවැස් තුළට ඒවායෙහි පිටුපසින් ඇතුල්වීම ධාර්මිෂ්ඨකම නොවේ. නමුත් (ඇත්තෙන්ම) ධාර්මිෂ්ඨ වන්නේ දෙවියන් කෙරෙහි බිය දක්වන්නාය. තවද නුඹලා නිවැස් තුළට ඒවායෙහි (ඉදිරි) දොරටුවෙන් ඇතුල්වනු. තවද නුඹලා සමෘද්ධිමත් වනු පිණිස අල්ලාහ් කෙරෙහි බිය දක්වනු.

يَسْأَلُونَكَ عَنِ الْأَهِلَّةِ ۖ قُلْ هِيَ مَوَاقِيتُ لِلنَّاسِ وَالْحَجِّ ۗ وَلَيْسَ الْبِرُّ بِأَن تَأْتُوا الْبُيُوتَ مِن ظُهُورِهَا وَلَٰكِنَّ الْبِرَّ مَنِ اتَّقَىٰ ۗ وَأْتُوا الْبُيُوتَ مِنْ أَبْوَابِهَا ۚ وَاتَّقُوا اللَّهَ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿١٩٠﴾

191. තවද නුඹලාට විරුද්ධව සටන් කරන්නන්ට එරෙහිව අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කරනු, එහෙත් සීමාව නොඉක්මවනු. නියතවශයෙන්ම අල්ලාහ් සීමාව ඉක්මවන්නන් ප්‍රිය නොකරන්නේය.

وَقَاتِلُوا فِي سَبِيلِ اللَّهِ الَّذِينَ يُقَاتِلُونَكُمْ وَلَا تَعْتَدُوٓا ۚ إِنَّ اللَّهَ لَا يُحِبُّ الْمُعْتَدِينَ ﴿١٩١﴾

192. තවද නුඹලා ඔවුන්ව දකින තැනකදී ඔවුන්ව මරා දමනු. තවද ඔවුන් නුඹලාව කොතැනකින් පලවා හැරියේද, නුඹලාද ඔවුන්ව එතැනින්ම පලවා හරිනු. මන්ද හිංසනය ඝාතනයටත් වඩා දරුණුය. තවද ශුද්ධවූ නැමදුම් ස්ථානය (තුළ හෝ) අවටදී ඔවුන් නුඹලා සමග සටන් කරන තුරු නුඹලා ඔවුන් සමග සටන් නොකරනු. නමුත් ඔවුන් නුඹලා සමග සටන් කළහොත් නුඹලාද ඔවුන් සමග සටන් කරනු. අවිශ්වාසිතයින් හට

وَاقْتُلُوهُمْ حَيْثُ ثَقِفْتُمُوهُمْ وَأَخْرِجُوهُم مِّنْ حَيْثُ أَخْرَجُوكُمْ ۚ وَالْفِتْنَةُ أَشَدُّ مِنَ الْقَتْلِ ۚ وَلَا تُقَاتِلُوهُمْ عِندَ الْمَسْجِدِ الْحَرَامِ حَتَّىٰ يُقَاتِلُوكُمْ فِيهِ ۖ فَإِن قَاتَلُوكُمْ

*සටහන. 189: මෙහිදී 'අන්' යන වචනය අනවශ්‍ය බව හැඟෙයි, මන්ද මෙම වාක්‍යය මූලික වශයෙන් පොදුජන මුදල් සහ ජාතික ධනය යන ඒවාට යෙදෙන බව පෙනී යන බැවිනි.

فَاقْتُلُوْهُمْ ۗ كَذٰلِكَ جَزَآءُ الْكٰفِرِيْنَ ﴿١٩٢﴾

දඬුවම එලෙසම වේ.

فَاِنِ انْتَهَوْا فَاِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿١٩٣﴾

193. නමුත් ඔවුන් වැළකෙන්නේ නම් එවිට නියත වශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය. පරම දයාබරය.

وَقٰتِلُوْهُمْ حَتّٰى لَا تَكُوْنَ فِتْنَةٌ وَّيَكُوْنَ الدِّيْنُ لِلّٰهِ ۗ فَاِنِ انْتَهَوْا فَلَا عُدْوَانَ اِلَّا عَلَى الظّٰلِمِيْنَ ﴿١٩٤﴾

194. තවද හිංසනය තුරන් වී ධර්මය අල්ලාහ් වෙනුවෙන්ම (නිදහසේ පිළිපැදිය හැකි) වනතාක් නුඹලා ඔවුන් සමග සටන් කරනු. නමුත් ඔවුන් වැළකෙන්නේ නම් (සිහිතබා ගනු) කලහකරුවන්ට එරෙහිව මිස අන් අය කෙරෙහි එදිරිවාදිකමට අවසර නැත.

اَلشَّهْرُ الْحَرَامُ بِالشَّهْرِ الْحَرَامِ وَالْحُرُمٰتُ قِصَاصٌ ۗ فَمَنِ اعْتَدٰى عَلَيْكُمْ فَاعْتَدُوْا عَلَيْهِ بِمِثْلِ مَا اعْتَدٰى عَلَيْكُمْ ۖ وَاتَّقُوا اللّٰهَ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ مَعَ الْمُتَّقِيْنَ ﴿١٩٥﴾

195. ශුද්ධවූ මාසය (උල්ලංඝනය කිරීම) වෙනුවට එම ශුද්ධවූ මාසයේදීම (ප්‍රතිප්‍රහාර දිය යුතුවේ.) තවද (සෑම) ශුද්ධවූ දේවල් වෙනුවෙන්ම ප්‍රතිප්‍රහාර (නීතිය) ඇත. එබැවින්, යම් කිසිවෙකු නුඹලාට එරෙහිව සීමාව ඉක්මවන්නේද ඔහු නුඹලාට එරෙහිව සීමාව ඉක්මවා ඇති ප්‍රමාණයටම ඔහුගේ සීමාව ඉක්මවීම හේතුවෙන් ඔහුට දඬුවම් පමුණුවනු. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු, තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වන්නන් සමඟ ඔහු සිටින බව දැනගනු.

وَاَنْفِقُوْا فِىْ سَبِيْلِ اللّٰهِ وَلَا تُلْقُوْا بِاَيْدِيْكُمْ اِلَى التَّهْلُكَةِ ۛ وَاَحْسِنُوْا ۛ اِنَّ اللّٰهَ يُحِبُّ الْمُحْسِنِيْنَ ﴿١٩٦﴾

196. තවද අල්ලාහ්ගේ මාර්ගයෙහි වියදම් කරනු. තවද නුඹලාගේ අතින්ම නුඹලාව විනාශයට ඇද නොදමනු, තවද යහකම් කරනු. නියතවශයෙන්ම අල්ලාහ් යහකම් කරන්නන් ප්‍රිය කරන්නේය.

وَاَتِمُّوا الْحَجَّ وَالْعُمْرَةَ لِلّٰهِ ۗ فَاِنْ اُحْصِرْتُمْ فَمَا اسْتَيْسَرَ مِنَ الْهَدْيِ ۚ وَلَا تَحْلِقُوْا رُءُوْسَكُمْ حَتّٰى يَبْلُغَ

197. තවද අල්ලාහ් වෙනුවෙන් හජ් වන්දනාව සහ උම්රාහ් සම්පූර්ණ කරනු. නමුත් නුඹලා බාධාවකට ලක්වූයේ නම් එවිට පහසුවෙන් ලැබිය හැකි (සත්ව) පරිත්‍යාගයක් (කරනු). තවද (සත්ව) පරිත්‍යාගය එහි නියමිත ස්ථානය කරා ලඟා වන

الْهَدْيُ مَحِلَّهُ ۚ فَمَنْ كَانَ مِنْكُمْ مَرِيضًا أَوْ بِهِ أَذًى مِنْ رَأْسِهِ فَفِدْيَةٌ مِنْ صِيَامٍ أَوْ صَدَقَةٍ أَوْ نُسُكٍ ۚ فَإِذَا أَمِنْتُمْ فَمَنْ تَمَتَّعَ بِالْعُمْرَةِ إِلَى الْحَجِّ فَمَا اسْتَيْسَرَ مِنَ الْهَدْيِ ۚ فَمَنْ لَمْ يَجِدْ فَصِيَامُ ثَلَاثَةِ أَيَّامٍ فِي الْحَجِّ وَسَبْعَةٍ إِذَا رَجَعْتُمْ ۗ تِلْكَ عَشَرَةٌ كَامِلَةٌ ۗ ذَٰلِكَ لِمَنْ لَمْ يَكُنْ أَهْلُهُ حَاضِرِي الْمَسْجِدِ الْحَرَامِ ۚ وَاتَّقُوا اللَّهَ وَاعْلَمُوا أَنَّ اللَّهَ شَدِيدُ الْعِقَابِ ﴿١٩٧﴾

තෙක් නුඹලාගේ හිස් මුඩු නොකරනු. තවද නුඹලා අතරින් කිසිවෙකු රෝගී වේ නම් හෝ හිසෙහි ආබාධයක් ඇත්නම්, ප්‍රතිකර්මයක් ලෙස උපවාසයෙහි යෙදීම හෝ දන්දීම හෝ පරිත්‍යාගයක් දීම හෝ (කළයුතු වේ.) නමුත් නුඹලා ආරක්ෂිත වන විටදී කවුරුන් හෝ හජ් වන්දනාව සමඟ උම්රාවෙහිද අවස්ථාව ලබන්නේද එවිට ඔහු පහසුවෙන් ලබාගත හැකි (සත්ව) පරිත්‍යාගයක් (දියයුතු වේ.) එහෙත් (නුඹලා අතරින් සත්ව පරිත්‍යාගයක්) ලබාගත නොහැකි අය, හජ් වන්දනාවේ තෙදිනක් උපවාසයෙහි යෙදිය යුතුවේ. තවද නුඹලා නිවැස් කරා ආපසු පැමිණ විට දින සතක් (උපවාසයෙහි යෙදිය යුතුය). මෙලෙස දහයක් පරිපූර්ණ වේ. මෙය ශුද්ධවූ නැමදුම් ස්ථානය අසල වාසය නොකරන අය සඳහා වේ. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩි බව දැනගනු.

الْحَجُّ أَشْهُرٌ مَعْلُومَاتٌ ۚ فَمَنْ فَرَضَ فِيهِنَّ الْحَجَّ فَلَا رَفَثَ وَلَا فُسُوقَ وَلَا جِدَالَ فِي الْحَجِّ ۗ وَمَا تَفْعَلُوا مِنْ خَيْرٍ يَعْلَمْهُ اللَّهُ ۗ وَتَزَوَّدُوا فَإِنَّ خَيْرَ الزَّادِ التَّقْوَىٰ ۚ وَاتَّقُونِ يَا أُولِي الْأَلْبَابِ ﴿١٩٨﴾

198. හජ් හි මාසයන් ඉතා ප්‍රසිද්ධය. එබැවින් කවුරුන් හෝ මෙම මාසයන්හිදී හජ් වන්දනාවේ යෙදීමට අධිෂ්ඨානය කරන්නේද, හජ් වන්දනා සමයේදී කිසිඳු පිළිකුල් කථාද, කිසිඳු සීමාව ඉක්මවීමක්ද, කිසිඳු අඬ දබර කිරීමක්ද නොකළ යුතු බව (සිහි තබා ගත යුතුවේ.) තවද නුඹලා කුමන යහපත් ක්‍රියාවක් කළද, අල්ලාහ් එය දනියි. තවද (අවශ්‍ය) ගමන් සැපයුම් පිළියෙල කරගනු. තවද නියතවශයෙන්ම ඉතාම යහපත් ගමන් සැපයුම බියබැතිකමය. තවද එම්බල වටහාගන්නා මිනිසුනි!, මා කෙරෙහි (පමණක්) බිය දක්වනු.

لَيْسَ عَلَيْكُمْ جُنَاحٌ أَنْ تَبْتَغُوا فَضْلًا مِنْ رَبِّكُمْ ۚ فَإِذَا أَفَضْتُمْ مِنْ عَرَفَاتٍ

199. නුඹලා, නුඹලාගේ අධිපතියාණන්ගේ වරප්‍රසාදය සෙවීම නුඹලාට පවක් නොවේ. නමුත් නුඹලා අරෆාත්හි සිට ආපසු පැමිණෙන

فَاذْكُرُوا اللَّهَ عِندَ الْمَشْعَرِ الْحَرَامِ ۖ وَاذْكُرُوهُ كَمَا هَدَاكُمْ وَإِن كُنتُم مِّن قَبْلِهِ لَمِنَ الضَّالِّينَ ﴿١٩٩﴾

විට මෂ්'අරිල්-හරාම් හිදී අල්ලාහ්ව සිහිපත් කරනු. තවද ඔහු නුඹලාට මග පෙන්වූ පරිදිම නුඹලා ඔහුව සිහිකරනු. එසේ තිබියදීත් නුඹලා මීට පෙර නොමග ගියවුන්ගෙන් වූහ.

ثُمَّ أَفِيضُوا مِنْ حَيْثُ أَفَاضَ النَّاسُ وَاسْتَغْفِرُوا اللَّهَ ۚ إِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٢٠٠﴾

200. පසුව ජනතාව කොතැන් සිට ආපසු පැමිණෙන්නේද, එතැන් සිටම නුඹලාද ආපසු පැමිණෙනු. තවද අල්ලාහ්ගෙන් ක්ෂමාව අයැදිනු. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

فَإِذَا قَضَيْتُم مَّنَاسِكَكُمْ فَاذْكُرُوا اللَّهَ كَذِكْرِكُمْ آبَاءَكُمْ أَوْ أَشَدَّ ذِكْرًا ۗ فَمِنَ النَّاسِ مَن يَقُولُ رَبَّنَا آتِنَا فِي الدُّنْيَا وَمَا لَهُ فِي الْآخِرَةِ مِنْ خَلَاقٍ ﴿٢٠١﴾

201. තවද නුඹලාට නියම වූ නැමදුම් පිළිවෙත් නුඹලා ඉටුකළ විට නුඹලාගේ පියවරුන්ව සිහිපත් කළ පරිදිම හෝ ඊටත් වඩා වැඩියෙන් අල්ලාහ්ව සිහිපත් කරනු. තවද 'අපගේ අධිපතියාණෙනි! අපට මෙලොවෙහි (යහපත් දේවල්) ලබාදෙනු මැනවැ'යි පවසන ඇතැමුන් මිනිසුන් අතර සිටින්නෝය. එවැන්නෙකුට පරලොවෙහි කිසිඳු කොටසක් නොවනු ඇත.

وَمِنْهُم مَّن يَقُولُ رَبَّنَا آتِنَا فِي الدُّنْيَا حَسَنَةً وَفِي الْآخِرَةِ حَسَنَةً وَقِنَا عَذَابَ النَّارِ ﴿٢٠٢﴾

202. තවද 'අපගේ අධිපතියාණෙනි! මෙලොවෙහිද යහපත මෙන්ම පරලොවෙහිද යහපත අපට ලබා දෙනු මැනව, තවද නිරාගින්නේ වේදනාවෙන් අප ආරක්ෂා කරනු මැනවැ'යි පවසන ඇතැමුන් ඔවුන් අතරම සිටින්නෙහුය.

أُولَٰئِكَ لَهُمْ نَصِيبٌ مِّمَّا كَسَبُوا ۚ وَاللَّهُ سَرِيعُ الْحِسَابِ ﴿٢٠٣﴾

203. මෙවැන්නන් හට, මොවුන් ඉපැයූ දේ හේතුවෙන් (යහපත්) කොටසක් ඇත. තවද අල්ලාහ් ගණන් ගැනීමෙහිලා ඉතා වේගවත්ය.

وَاذْكُرُوا اللَّهَ فِي أَيَّامٍ مَّعْدُودَاتٍ ۚ فَمَن تَعَجَّلَ فِي يَوْمَيْنِ فَلَا إِثْمَ عَلَيْهِ وَمَن

204. එමෙන්ම නියමිත දිනයන්හිදී අල්ලාහ්ව සිහිපත් කරනු. නමුත් කවුරුන් හෝ දින දෙකකින් (පිටත්වීමට) ඉක්මන් වන්නේද, ඔහු කෙරෙහි කිසිදු පවක් නැත. තවද

تَاَخَّرَ فَلَآ اِثْمَ عَلَيْهِ ۙ لِمَنِ اتَّقٰى ؕ وَاتَّقُوا اللّٰهَ وَاعْلَمُوْٓا اَنَّكُمْ اِلَيْهِ تُحْشَرُوْنَ ﴿٢٠٤﴾

කවුරුන් හෝ රැඳී සිටින්නේද, ඔහු කෙරෙහිද කිසිදු පවක් නැත. යමෙක් දෙවියන් කෙරෙහි බිය දක්වන්නේද (මෙය) ඔහුටය. තවද නුඹලා අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද නුඹලා ඔහුගේ අභියසට එක්රැස් කරනු ලබන්නේ යැයි දැනගනු.

وَمِنَ النَّاسِ مَنْ يُّعْجِبُكَ قَوْلُهٗ فِى الْحَيٰوةِ الدُّنْيَا وَيُشْهِدُ اللّٰهَ عَلٰى مَا فِىْ قَلْبِهٖ ۙ وَهُوَ اَلَدُّ الْخِصَامِ ﴿٢٠٥﴾

205. තවද මිනිසුන් අතර කිසිවෙකු වේද, ඔහුගේ මෙලොව ජීවිතය පිළිබඳ කථාව ඔබට කැමැත්ත ඇති කරන්නේය. තවද ඔහු සිය හදවතෙහි ඇති දෙයට අල්ලාහ්ව සාක්ෂි වශයෙන් කැඳවයි, එහෙත් ඔහු ඉතාමත් කලහකාරීව අඩ දබර කරන්නෙක්වේ.

وَاِذَا تَوَلّٰى سَعٰى فِى الْاَرْضِ لِيُفْسِدَ فِيْهَا وَيُهْلِكَ الْحَرْثَ وَالنَّسْلَ ؕ وَاللّٰهُ لَا يُحِبُّ الْفَسَادَ ﴿٢٠٦﴾

206. තවද ඔහු බලයෙහි සිටින විට පොළොවෙහි කෝලාහල ඇතිකිරීම සඳහාද අස්වැන්න මෙන්ම (මිනිසාගේ) මතු පරම්පරාව වනසා දැමීම සඳහාද එහි උත්සාහ දරයි. එහෙත් අල්ලාහ් කෝලාහලයට කැමැති නොවෙයි.

وَاِذَا قِيْلَ لَهُ اتَّقِ اللّٰهَ اَخَذَتْهُ الْعِزَّةُ بِالْاِثْمِ فَحَسْبُهٗ جَهَنَّمُ ؕ وَلَبِئْسَ الْمِهَادُ ﴿٢٠٧﴾

207. තවද 'අල්ලාහ් කෙරෙහි බියවන්නැ'යි ඔහුට කියනු ලැබූ විට පුහුමානය ඔහුව (තවදුරටත්) පාපයට පොළඹවයි. එබැවින් නිරය ඔහුගේ ප්‍රතිවිපාකයට ප්‍රමාණවත් වේ. තවද, නියතවශයෙන්ම එය ඉතාමත් නපුරු නවාතැනක් වේ.

وَمِنَ النَّاسِ مَنْ يَّشْرِىْ نَفْسَهُ ابْتِغَآءَ مَرْضَاتِ اللّٰهِ ؕ وَاللّٰهُ رَءُوْفٌ بِالْعِبَادِ ﴿٢٠٨﴾

208. තවද අල්ලාහ්ගේ තෘප්තිය ලබාගැනීමේ අපේක්ෂාවෙන් තමන්වම කැපකරන්නාවූ අයද මිනිසුන් අතර වේ. තවද අල්ලාහ් (ඔහුගේ) දාසයින් හට සානුකම්පිතය.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا ادْخُلُوْا فِى السِّلْمِ كَآفَّةً ۖ وَلَا تَتَّبِعُوْا خُطُوٰتِ الشَّيْطٰنِ ؕ اِنَّهٗ لَكُمْ عَدُوٌّ مُّبِيْنٌ ﴿٢٠٩﴾

209. එම්බල විශ්වාසිතයිනි! යටහත්භාවයට (ඉස්ලාමයට) සියල්ලන්ම පිවිසෙනු. තවද ෂෙයිතාන්ගේ අඩිපාර අනුගමනය නොකරනු. නියතවශයෙන්ම ඔහු නුඹලාගේ විවෘත සතුරෙකි.

فَاِنْ زَلَلْتُمْ مِّنْۢ بَعْدِ مَا جَآءَتْكُمُ الْبَيِّنٰتُ فَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ عَزِيْزٌ حَكِيْمٌ ﴿٢١٠﴾

210. නමුත් නුඹලා වෙතට පැහැදිලි සළකුණු පැමිණි පසුවද නුඹලා ඉවත්ව යන්නේ නම්, එවිට අල්ලාහ් බලසම්පන්න හා ප්‍රඥාසම්පන්න බවද දැනගනු.

هَلْ يَنْظُرُوْنَ اِلَّآ اَنْ يَّاْتِيَهُمُ اللّٰهُ فِيْ
ظُلَلٍ مِّنَ الْغَمَامِ وَالْمَلٰٓئِكَةُ وَقُضِيَ
الْاَمْرُ ؕ وَاِلَى اللّٰهِ تُرْجَعُ الْاُمُوْرُ ﴿٢١١﴾

211. අල්ලාහ්ද සුරදූතයින්ද වළාකුළු සෙවනෙහි ඔවුන් වෙතට පැමිණ, එම කාර්යය තීන්දු කරනු ලබනවා හැර වෙන කිසිවක් ඔවුහු බලාපොරොත්තු වන්නෙහුද? තවද සියලු දේ අල්ලාහ් වෙතම ආපසු යනු ඇත.

سَلْ بَنِیْٓ اِسْرَآءِيْلَ كَمْ اٰتَيْنٰهُمْ مِّنْ اٰيَةٍۭ
بَيِّنَةٍ ؕ وَمَنْ يُّبَدِّلْ نِعْمَةَ اللّٰهِ مِنْۢ بَعْدِ
مَا جَآءَتْهُ فَاِنَّ اللّٰهَ شَدِيْدُ الْعِقَابِ ﴿٢١٢﴾

212. අප කොපමණ පැහැදිලි සළකුණු ඔවුන්ට දුන්නේ දැයි ඉස්රාඊලයේ දරුවන්ගෙන් විමසා බලනු. නමුත් කවුරුන් හෝ අල්ලාහ්ගේ දයාදය ඔහු වෙත ලැබුණු පසු එය වෙනස් කරන්නේද, නියතවශයෙන්ම අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

زُيِّنَ لِلَّذِيْنَ كَفَرُوا الْحَيٰوةُ الدُّنْيَا
وَيَسْخَرُوْنَ مِنَ الَّذِيْنَ اٰمَنُوْا ۘ وَالَّذِيْنَ
اتَّقَوْا فَوْقَهُمْ يَوْمَ الْقِيٰمَةِ ؕ وَاللّٰهُ يَرْزُقُ
مَنْ يَّشَآءُ بِغَيْرِ حِسَابٍ ﴿٢١٣﴾

213. මෙලොව ජීවිතය අවිශ්වාසිතයින් හට ආකර්ෂණීය ලෙස (පෙනෙන්නට) සලස්වන ලදී. තවද ඔවුහු විශ්වාසිතයින්ට සරදම් කරන්නෝය. එහෙත් (දෙවියන් කෙරෙහි) බිය ඇති අය පුනරුත්ථාන දිනයේදී ඔවුන්ට ඉහලින් සිටිනු ඇත. තවද අල්ලාහ් ඔහු කැමැති ඕනෑම කෙනෙකුට (ඔහුගේ ත්‍යාග) ගණන් බැලීමකින් තොරව පිරිනමයි.

كَانَ النَّاسُ اُمَّةً وَّاحِدَةً ۟ فَبَعَثَ اللّٰهُ
النَّبِيّٖنَ مُبَشِّرِيْنَ وَمُنْذِرِيْنَ ۪ وَاَنْزَلَ
مَعَهُمُ الْكِتٰبَ بِالْحَقِّ لِيَحْكُمَ بَيْنَ النَّاسِ
فِيْمَا اخْتَلَفُوْا فِيْهِ ؕ وَمَا اخْتَلَفَ فِيْهِ اِلَّا
الَّذِيْنَ اُوْتُوْهُ مِنْۢ بَعْدِ مَا جَآءَتْهُمُ
الْبَيِّنٰتُ بَغْيًاۢ بَيْنَهُمْ ۚ فَهَدَى اللّٰهُ الَّذِيْنَ
اٰمَنُوْا لِمَا اخْتَلَفُوْا فِيْهِ مِنَ الْحَقِّ بِاِذْنِهٖ ؕ
وَاللّٰهُ يَهْدِيْ مَنْ يَّشَآءُ اِلٰى صِرَاطٍ

214. මනුෂ්‍ය වර්ගයා එක් ජන සමූහයක්ව සිටියහ. (පසුව ඔවුන්, ඔවුනතර භේද වූහ), එබැවින් අල්ලාහ් ශුභාරංචි ගෙනෙන්නන් ලෙසද අවවාදකරුවන් ලෙසද, වක්තෘවරුන් පත්කොට, ඔහු ඔවුන් භේද වූ දැයෙහි මිනිසුන් අතර විනිශ්චය කිරීම සඳහා සත්‍යය අඩංගු පුස්තකය ඔවුන් සමග පහළ කළේය. (නමුත් ඔවුන් දැන් පුස්තකය පිළිබඳව භේද වීමට පටන් ගත්හ.) තවද ඔවුන් වෙතට පැහැදිලි සළකුණු පැමිණි පසු, එය දෙනු ලැබූ අය, ඔවුනොවුන් අතරවූ ඊර්ෂ්‍යා කිරීම හේතුවෙන් මිස කිසිවෙක් ඒ ගැන භේද නොවූහ. එබැවින් දැන් අල්ලාහ්, ඔහුගේ නියෝගයෙන්, විශ්වාසිතයින්ට ඔවුන් (අවිශ්වාසිතයින්) භේද වූ දේ සම්බන්ධව සත්‍යය කරා මග

مُّسْتَقِيمٍ ﴿٢١٤﴾

පෙන්විය. තවද අල්ලාහ්, ඔහු කැමැති ඕනෑම කෙනෙකුට යහමග පෙන්වයි.

أَمْ حَسِبْتُمْ أَن تَدْخُلُوا الْجَنَّةَ وَلَمَّا يَأْتِكُم مَّثَلُ الَّذِينَ خَلَوْا مِن قَبْلِكُم ۖ مَّسَّتْهُمُ الْبَأْسَاءُ وَالضَّرَّاءُ وَزُلْزِلُوا حَتَّىٰ يَقُولَ الرَّسُولُ وَالَّذِينَ آمَنُوا مَعَهُ مَتَىٰ نَصْرُ اللَّهِ ۗ أَلَا إِنَّ نَصْرَ اللَّهِ قَرِيبٌ ﴿٢١٥﴾

215. නුඹලාට පෙර කාල ක්‍රියාකළ අයගේ තත්ත්වය නුඹලා හට නොපැමිණෙන තෙක් නුඹලා ස්වර්ගයට ඇතුළු වනු ඇතැයි සිතන්නෙහුද? දිළිඳුකම සහ විපත්ද ඔවුනට පැමිණියේය, තවද දූතයාණන්ද, ඔහු සමඟ සිටි විශ්වාසිතයින්ද අල්ලාහ්ගේ පිහිට කවදා පැමිණෙන්නේද'යි පවසන තෙක් ඔවුහු දරුණු කම්පනයකට ලක් කරන ලද්දාහ. දැනගනු, නියතවශයෙන්ම අල්ලාහ්ගේ පිහිට ඉතා සමීපයෙහිය.

يَسْأَلُونَكَ مَاذَا يُنفِقُونَ ۖ قُلْ مَا أَنفَقْتُم مِّنْ خَيْرٍ فَلِلْوَالِدَيْنِ وَالْأَقْرَبِينَ وَالْيَتَامَىٰ وَالْمَسَاكِينِ وَابْنِ السَّبِيلِ ۗ وَمَا تَفْعَلُوا مِنْ خَيْرٍ فَإِنَّ اللَّهَ بِهِ عَلِيمٌ ﴿٢١٦﴾

216. ඔවුන් කුමක් වැය කළ යුතු දැයි ඔබගෙන් අසති. 'කුමන හෝ යහපත් මෙන්ම බහුල වූ ධනය නුඹලා වැය කරන්නේද, එය දෙමව්පියන්ටද සමීප ඥාතීන්ටද අනාථයින්ටද දුගීන්ටද මගීන්ටද විය යුතුයැ'යි පවසන්න. තවද නුඹලා කුමන යහපත් ක්‍රියාවක් කළද, නියතවශයෙන්ම අල්ලාහ් එය මැනැවින් දනියි.

كُتِبَ عَلَيْكُمُ الْقِتَالُ وَهُوَ كُرْهٌ لَّكُمْ ۖ وَعَسَىٰ أَن تَكْرَهُوا شَيْئًا وَهُوَ خَيْرٌ لَّكُمْ ۖ وَعَسَىٰ أَن تُحِبُّوا شَيْئًا وَهُوَ شَرٌّ لَّكُمْ ۗ وَاللَّهُ يَعْلَمُ وَأَنتُمْ لَا تَعْلَمُونَ ﴿٢١٧﴾

217. සටන් කිරීම නුඹලාට අතිශයින්ම අප්‍රිය වුවද, එය නුඹලා කෙරෙහි නියම කරන ලදී. නමුත් නුඹලා ප්‍රිය නොකරන යම් දෙයක් එය නුඹලාට යහපතක් විය හැකිය, එසේම නුඹලා ප්‍රිය කරන යම් දෙයක් එය නුඹලාට අයහපතක් විය හැකිය. අල්ලාහ් (සියල්ල) දනියි. එහෙත් නුඹලා නොදන්නෙහුය.

يَسْأَلُونَكَ عَنِ الشَّهْرِ الْحَرَامِ قِتَالٍ فِيهِ ۖ قُلْ قِتَالٌ فِيهِ كَبِيرٌ ۖ وَصَدٌّ عَن سَبِيلِ اللَّهِ وَكُفْرٌ بِهِ وَالْمَسْجِدِ الْحَرَامِ وَإِخْرَاجُ

218. ශුද්ධවූ මාසය තුළදී සටන් කිරීම ගැන ඔවුහු ඔබගෙන් අසති. එය තුළදී සටන් කිරීම මහත් (සීමාව ඉක්මවීමක්)වේ, නමුත් අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වැළැක්වීමද, ඔහුට අකෘතඥ වීමද, ශුද්ධවූ නැමදුම් ස්ථානයෙන් (මිනිසුන්ව

වැළැක්වීම)ද, එහිවූ ජනතාව එතැනින් පලවා හැරීමද අල්ලාහ් අභියස අතිමහත් (පාපයක්)වේ. තවද හිංසනය ඝාතනයට වඩා ඉතාමත් නරක දෙයකි'යි පවසන්න. තවද ඔවුන්ට හැකි නම්, නුඹලාගේ විශ්වාසයෙන් නුඹලාව ආපසු හරවන තුරු ඔවුහු නුඹලා සමඟ සටන් කිරීම නොනවත්වනු ඇත. තවද නුඹලා අතරින් කවරෙකු හෝ තම විශ්වාසයෙන් හැර ගොස් අවිශ්වාසිතයෙකු ලෙස මරණයට පත් වන්නේද, එවන් අයගේ ක්‍රියාවන් මෙලොවෙහිදීද මතුලොවෙහිදීද නිෂ්ඵල වන්නේය. තවද ගින්නෙහි වැසියන් මොවුන්මය, මොවුහු එහිම වෙසෙන්නෙහුය.

اَهْلِهٖ مِنْهُ اَكْبَرُ عِنْدَ اللّٰهِ ۚ وَالْفِتْنَةُ
اَكْبَرُ مِنَ الْقَتْلِ ۗ وَلَا يَزَالُوْنَ
يُقَاتِلُوْنَكُمْ حَتّٰى يَرُدُّوْكُمْ عَنْ دِيْنِكُمْ
اِنِ اسْتَطَاعُوْا ۗ وَمَنْ يَّرْتَدِدْ مِنْكُمْ عَنْ
دِيْنِهٖ فَيَمُتْ وَهُوَ كَافِرٌ فَاُولٰٓئِكَ حَبِطَتْ
اَعْمَالُهُمْ فِى الدُّنْيَا وَالْاٰخِرَةِ ۚ وَاُولٰٓئِكَ
اَصْحٰبُ النَّارِ ۚ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿٢١٨﴾

219. විශ්වාස කරන අයද සංක්‍රමණය කරන අයද අල්ලාහ්ගේ මාර්ගයෙහි දැඩිව පරිශ්‍රමයෙහි යෙදෙන අයද වන මොවුහු, අල්ලාහ්ගේ දයාව අපේක්ෂා කරති. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَالَّذِيْنَ هَاجَرُوْا
وَجٰهَدُوْا فِىْ سَبِيْلِ اللّٰهِ ۙ اُولٰٓئِكَ يَرْجُوْنَ
رَحْمَتَ اللّٰهِ ۗ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٢١٩﴾

220. ඔවුහු මත්පැන් සහ සූදු කෙළීම පිළිබඳව ඔබගෙන් විමසති. පවසන්න, 'ඒ දෙකෙහිම මහත් පාපයද මිනිසුන්ට (යම්) ප්‍රයෝජනද වේ. එහෙත් මේවායේ පාපය මේවායේ ප්‍රයෝජනයට වඩා මහත්ය.' තවද ඔවුහු තමන් කුමක් වැය කළ යුතු දැයි, ඔබගෙන් අසති. 'නුඹලා සතු අමතරව ඇති දේය'යි පවසන්න. නුඹලා වටහාගනු පිණිස අල්ලාහ්, ඔහුගේ විධානයන් මෙලෙස නුඹලාට පහදා දෙන්නේය.

يَسْـَٔلُوْنَكَ عَنِ الْخَمْرِ وَالْمَيْسِرِ ۗ قُلْ
فِيْهِمَآ اِثْمٌ كَبِيْرٌ وَّمَنَافِعُ لِلنَّاسِ ۙ
وَاِثْمُهُمَآ اَكْبَرُ مِنْ نَّفْعِهِمَا ۗ
وَيَسْـَٔلُوْنَكَ مَاذَا يُنْفِقُوْنَ ۖ قُلِ الْعَفْوَ ۗ
كَذٰلِكَ يُبَيِّنُ اللّٰهُ لَكُمُ الْاٰيٰتِ لَعَلَّكُمْ
تَتَفَكَّرُوْنَ ۙ﴿٢٢٠﴾

221. මෙලොව සහ පරලොව ගැන (වටහා ගත යුතු)ය. තවද ඔවුහු ඔබගෙන් අනාථයින් පිළිබඳව විමසති. 'ඔවුන්ගේ සුභසාධනය නගා

فِى الدُّنْيَا وَالْاٰخِرَةِ ۗ وَيَسْـَٔلُوْنَكَ عَنِ
الْيَتٰمٰى ۗ قُلْ اِصْلَاحٌ لَّهُمْ خَيْرٌ ۗ وَاِنْ

සිටුවීම ශ්‍රේෂ්ඨවූ යහපත් (ක්‍රියාවක්)වේ. තවද නුඹලා ඔවුන් සමඟ එක් වන්නේ නම්, ඔවුන් නුඹලාගේ සොහොයුරන්මය. තවද අල්ලාහ් කලහකරුවාව සංශෝධකයාගෙන් වෙන්කර හඳුනයි. තවද අල්ලාහ් කැමැති වුවහොත්, ඔහු නුඹලාව දුෂ්කරතාවයට පත් කරන්නට තිබුණි. නියතවශයෙන්ම, අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නයැ'යි පවසන්න.

تُخَالِطُوهُمْ فَإِخْوَانُكُمْ ۚ وَاللَّهُ يَعْلَمُ الْمُفْسِدَ مِنَ الْمُصْلِحِ ۚ وَلَوْ شَاءَ اللَّهُ لَأَعْنَتَكُمْ ۚ إِنَّ اللَّهَ عَزِيزٌ حَكِيمٌ ﴿٢٢١﴾

222. තවද ප්‍රතිමා පුදන ස්ත්‍රීන් විශ්වාස කරන තුරු නුඹලා ඔවුන්ව විවාහ කර නොගනු. ප්‍රතිමා පුදන ස්ත්‍රියක් නුඹලාට (ඉතාමත්) ප්‍රියමනාප වුවද ඇයට වඩා විශ්වාසිත වහල් ස්ත්‍රියක් වඩාත් යහපත්ය. තවද ප්‍රතිමා පුදන්නන් විශ්වාස කරන තුරු (විශ්වාසිත ස්ත්‍රීන්ව) ඔවුන්ට විවාහ කර නොදෙනු. ප්‍රතිමා පුදන්නෙකු නුඹලාට (ඉතාමත්) ප්‍රියමනාප වුවද, ඔහුට වඩා විශ්වාසිත වහලෙකු වඩාත් යහපත්ය. මොවුහු ගින්න වෙතට කැඳවන්නෙහුය, එහෙත් අල්ලාහ් ඔහුගේ විධානයෙන් ස්වර්ගය වෙතටද ක්ෂමාව වෙතටද කැඳවන්නේය. තවද ඔවුන් සිහිතබාගනු පිණිස ඔහු තම සළකුණු මිනිසුන්ට පැහැදිලිව විස්තර කරයි.

وَلَا تَنكِحُوا الْمُشْرِكَاتِ حَتَّىٰ يُؤْمِنَّ ۚ وَلَأَمَةٌ مُّؤْمِنَةٌ خَيْرٌ مِّن مُّشْرِكَةٍ وَلَوْ أَعْجَبَتْكُمْ ۗ وَلَا تُنكِحُوا الْمُشْرِكِينَ حَتَّىٰ يُؤْمِنُوا ۚ وَلَعَبْدٌ مُّؤْمِنٌ خَيْرٌ مِّن مُّشْرِكٍ وَلَوْ أَعْجَبَكُمْ ۗ أُولَٰئِكَ يَدْعُونَ إِلَى النَّارِ ۖ وَاللَّهُ يَدْعُو إِلَى الْجَنَّةِ وَالْمَغْفِرَةِ بِإِذْنِهِ ۖ وَيُبَيِّنُ آيَاتِهِ لِلنَّاسِ لَعَلَّهُمْ يَتَذَكَّرُونَ ﴿٢٢٢﴾ ع ٢٧ ١١

223. තවද ඔවුහු ඔබගෙන් ඔසප්වීම පිළිබඳව විමසති. පවසන්න, 'එය අසනීප තත්ත්වයකි. එහෙයින් ඔසප්වන සමයේදී ස්ත්‍රීන්ගෙන් වැළකී සිටිනු. තවද ඔවුන් පවිත්‍ර වන තෙක් ඔවුන් වෙතට නොයනු. නමුත් ඔවුන්ම, පවිත්‍ර වුවායින් පසු, අල්ලාහ් නුඹලාට විධානය කර ඇති පරිදි ඔවුන් වෙතට යනු. අල්ලාහ් ඔහු වෙතට හැරෙන්නන්ව ප්‍රිය කරන අතර තමන්ව පවිත්‍රව තබාගන්නන්වද ප්‍රිය කරයි.'

وَيَسْأَلُونَكَ عَنِ الْمَحِيضِ ۖ قُلْ هُوَ أَذًى فَاعْتَزِلُوا النِّسَاءَ فِي الْمَحِيضِ ۖ وَلَا تَقْرَبُوهُنَّ حَتَّىٰ يَطْهُرْنَ ۖ فَإِذَا تَطَهَّرْنَ فَأْتُوهُنَّ مِنْ حَيْثُ أَمَرَكُمُ اللَّهُ ۚ إِنَّ اللَّهَ يُحِبُّ التَّوَّابِينَ وَيُحِبُّ الْمُتَطَهِّرِينَ ﴿٢٢٣﴾

نِسَآؤُكُمْ حَرْثٌ لَّكُمْ ۖ فَأْتُوا حَرْثَكُمْ أَنَّىٰ شِئْتُمْ ۖ وَقَدِّمُوا لِأَنفُسِكُمْ ۚ وَاتَّقُوا اللَّهَ وَاعْلَمُوا أَنَّكُم مُّلَاقُوهُ ۗ وَبَشِّرِ الْمُؤْمِنِينَ ﴿٢٢٤﴾

224. නුඹලාගේ භාර්යයාවන් නුඹලාට අස්වැද්දූ බිමක් වැනිය. එබැවින් නුඹලා කැමති පරිදි නුඹලාගේ අස්වැද්දූ බිම වෙතට යනු. තවද නුඹලා වෙනුවෙන් (යහපත් දේ) පෙරට යවනු. තවද අල්ලාහ්ට බිය දක්වනු. තවද නුඹලා සත්තකින්ම ඔහුව හමුවන බව දැනගනු. තවද විශ්වාසිතයින් හට ශුභාරංචි දෙන්න.

وَلَا تَجْعَلُوا اللَّهَ عُرْضَةً لِّأَيْمَانِكُمْ أَن تَبَرُّوا وَتَتَّقُوا وَتُصْلِحُوا بَيْنَ النَّاسِ ۗ وَاللَّهُ سَمِيعٌ عَلِيمٌ ﴿٢٢٥﴾

225. තවද නුඹලා යහපත් ක්‍රියා කිරීම, බියබැතිමත්ව කටයුතු කිරීම සහ මිනිසුන් අතර සමගිය ඇතිකිරීම යනාදියෙන් වැළකී සිටීම සඳහා නුඹලාගේ දිවුරුම්වලට අල්ලාහ්ව ඉලක්ක කර නොගනු. තවද අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දත්තාය.

لَّا يُؤَاخِذُكُمُ اللَّهُ بِاللَّغْوِ فِي أَيْمَانِكُمْ وَلَٰكِن يُؤَاخِذُكُم بِمَا كَسَبَتْ قُلُوبُكُمْ ۗ وَاللَّهُ غَفُورٌ حَلِيمٌ ﴿٢٢٦﴾

226. නිෂ්ඵල වූ නුඹලාගේ දිවුරුම් සඳහා අල්ලාහ් නුඹලාගෙන් ප්‍රශ්න නොකරන්නේය. එහෙත් නුඹලාගේ හදවත් යමක් උපයා ගත්තේද ඒ ගැන නුඹලාගෙන් ඔහු ප්‍රශ්න කරන්නේය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, ඉවසිලිවන්තය.

لِّلَّذِينَ يُؤْلُونَ مِن نِّسَائِهِمْ تَرَبُّصُ أَرْبَعَةِ أَشْهُرٍ ۖ فَإِن فَاءُوا فَإِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٢٢٧﴾

227. ඔවුන්ගේ භාර්යයාවන්ගෙන් (වැළකී සිටීමට) පොරොන්දු දෙන අය හට (උපරිම) රැඳුම් කාලය සිව් මසකි: පසුව ඔවුන් පොරොන්දුවෙන් වෙන්ව් හැර යන්නේ නම්, නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَإِنْ عَزَمُوا الطَّلَاقَ فَإِنَّ اللَّهَ سَمِيعٌ عَلِيمٌ ﴿٢٢٨﴾

228. තවද ඔවුන් දික්කසාද වීමට තිරණය කළේනම්, නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දත්තාය.

وَالْمُطَلَّقَاتُ يَتَرَبَّصْنَ بِأَنفُسِهِنَّ ثَلَاثَةَ قُرُوءٍ ۚ وَلَا يَحِلُّ لَهُنَّ أَن يَكْتُمْنَ مَا خَلَقَ اللَّهُ فِي أَرْحَامِهِنَّ إِن كُنَّ يُؤْمِنَّ

229. තවද දික්කසාද වූ ස්ත්‍රීන් තමන්ව ඔසප් වාර තුනක් වනතුරු රඳවා ගත යුතු වන්නේය. ඔවුන් අල්ලාහ් කෙරෙහිද අවසාන දිනය කෙරෙහිද විශ්වාස කරන්නේ නම් අල්ලාහ් ඔවුන්ගේ ගර්භාෂයන්හි මැවූ

بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ ؕ وَبُعُوْلَتُهُنَّ اَحَقُّ
بِرَدِّهِنَّ فِىْ ذٰلِكَ اِنْ اَرَادُوْٓا اِصْلَاحًا ؕ
وَلَهُنَّ مِثْلُ الَّذِىْ عَلَيْهِنَّ بِالْمَعْرُوْفِ ۪
وَلِلرِّجَالِ عَلَيْهِنَّ دَرَجَةٌ ؕ وَاللّٰهُ عَزِيْزٌ
حَكِيْمٌ ﴿٢٢٩﴾ ع ٢٨ ٧ ١٢

දේ ඔවුන් සඟවා තැබීම ඔවුන්ට නිත්‍යානුකූල නොවේ. තවද ඔවුන් සමගි වීමට කැමති වන්නේ නම් එම වාරය තුළදී ඔවුන්ව ආපසු කැඳවා ගැනීමට ඔවුන්ගේ සැමියන්ට වැඩි අයිතියක් ඇත. තවද කොතරම් (අයිතීන්) ඔවුන් (ස්ත්‍රීන්) මත (පුරුෂයින්ට) ඇත්තේද, එතරම් අයිතීන් (පුරුෂයින්මත) ඔවුනට සාධාරණත්වයෙන් ඇත. නමුත් පුරුෂයින්ට ඔවුන්ට වඩා උසස් තත්ත්වයක් ඇත. තවද අල්ලාහ් බලසම්පන්නය. ප්‍රඥාසම්පන්නය.

اَلطَّلَاقُ مَرَّتٰنِ ۪ فَاِمْسَاكٌ بِمَعْرُوْفٍ اَوْ
تَسْرِيْحٌ بِاِحْسَانٍ ؕ وَلَا يَحِلُّ لَكُمْ اَنْ
تَاْخُذُوْا مِمَّآ اٰتَيْتُمُوْهُنَّ شَيْــًٔا اِلَّآ اَنْ
يَّخَافَآ اَلَّا يُقِيْمَا حُدُوْدَ اللّٰهِ ؕ فَاِنْ
خِفْتُمْ اَلَّا يُقِيْمَا حُدُوْدَ اللّٰهِ ۙ فَلَا جُنَاحَ
عَلَيْهِمَا فِيْمَا افْتَدَتْ بِهٖ ؕ تِلْكَ حُدُوْدُ اللّٰهِ
فَلَا تَعْتَدُوْهَا ۚ وَمَنْ يَّتَعَدَّ حُدُوْدَ اللّٰهِ
فَاُولٰٓئِكَ هُمُ الظّٰلِمُوْنَ ﴿٢٣٠﴾

230. එබඳු දික්කසාද දෙවරක් (ප්‍රකාශයට පත්කළ හැකි)වේ. පසුව, (දික්කසාද කළ ස්ත්‍රීන් වන) ඔවුන්ව උචිත ආකාරයෙන් රඳවා ගත යුතුයි, නැතහොත් කරුණාපූර්වකව (ඔවුන්ව) පිටත්කොට යැවිය යුතුයි. අල්ලාහ්ගේ (නියම කොට ඇති) සීමාවන් රැකිය නොහැකි යැයි ඒ දෙදෙනාම බිය වන්නේ නම් මිස නුඹලා ඔවුන්ට (නුඹලාගේ බිරියන්ට) දුන් දැයින් කිසිවක් ආපසු ගැනීම නුඹලාට නිත්‍යානුකූල නොවේ. නමුත් ඔවුන්ට අල්ලාහ්ගේ (නියම කොට ඇති) සීමාවන් රැකිය නොහැකි යැයි නුඹලා (පරි පාලකයින්) බිය වන්නේ නම්, ඇයගේ නිදහස ලබාගැනීම සඳහා ඇය යමක් දෙන්නේ නම් ඔවුන් දෙදෙනා කෙරෙහි කිසිඳු පවක් නොමැත. මේවා අල්ලාහ්ගේ (නියම කරන ලද) සීමාවන්වේ, එබැවින් නුඹලා ඒවා ඉක්මවා නොයනු. තවද කවුරුන් හෝ අල්ලාහ්ගේ (නියම කරන ලද) සීමාවන් ඉක්මවන්නේද, වැරදිකරුවන් වන්නේ ඔවුන්මය.

فَاِنْ طَلَّقَهَا فَلَا تَحِلُّ لَهٗ مِنْۢ بَعْدُ حَتّٰى
تَنْكِحَ زَوْجًا غَيْرَهٗ ؕ فَاِنْ طَلَّقَهَا فَلَا
جُنَاحَ عَلَيْهِمَآ اَنْ يَّتَرَاجَعَآ اِنْ ظَنَّآ اَنْ

231. තවද ඔහු ඇයව (තෙවන වරටත්) දික්කසාද කරන්නේ නම්, ඉන් පසුව ඇය ඔහු හැර වෙනත් පුරුෂයෙකු සමග විවාහ වන තුරු ඇය ඔහුට නිත්‍යානුකූල නොවන්නිය. තවද ඔහුත් ඇයව දික්කසාද කරන්නේ නම්, (පෙර විවාහක) ඔවුන්

يُّقِيمَا حُدُودَ اللّٰهِ ؕ وَتِلْكَ حُدُوْدُ اللّٰهِ
يُبَيِّنُهَا لِقَوْمٍ يَّعْلَمُوْنَ ﴿٢٣١﴾

දෙදෙනාටම අල්ලාහ්ගේ (නියම කරන ලද) සීමාවන් රැකිය හැකි යැයි ඔවුන් ස්ථිර කරන්නේ නම්, ඔවුන් එකිනෙකාට නැවත එක්වීම ඔවුන් කෙරෙහි පවක් නැත. තවද මේවා අල්ලාහ්ගේ (නියම කරන ලද) සීමාවන් වන අතර ඔහු මේවා නුවණැති ජනතාවට පැහැදිලි කරන්නේය.

وَاِذَا طَلَّقْتُمُ النِّسَآءَ فَبَلَغْنَ اَجَلَهُنَّ
فَاَمْسِكُوْهُنَّ بِمَعْرُوْفٍ اَوْ سَرِّحُوْهُنَّ
بِمَعْرُوْفٍ ۪ وَلَا تُمْسِكُوْهُنَّ ضِرَارًا
لِّتَعْتَدُوْا ۚ وَمَنْ يَّفْعَلْ ذٰلِكَ فَقَدْ ظَلَمَ
نَفْسَهٗ ؕ وَلَا تَتَّخِذُوْٓا اٰيٰتِ اللّٰهِ هُزُوًا ۫
وَاذْكُرُوْا نِعْمَتَ اللّٰهِ عَلَيْكُمْ وَمَآ اَنْزَلَ
عَلَيْكُمْ مِّنَ الْكِتٰبِ وَالْحِكْمَةِ يَعِظُكُمْ
بِهٖ ؕ وَاتَّقُوا اللّٰهَ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ بِكُلِّ
شَيْءٍ عَلِيْمٌ ﴿٢٣٢﴾ ع ٢٩ ٣ ١٣

232. තවද නුඹලාගේ භාර්යාවන්ව නුඹලා දික්කසාද◆ කර, ඔවුන්ගේ (නියමිත) වාරයේ අවසානයට ඔවුන් ළඟා වූ කල්හි, ඔවුන්ව යහපත් අන්දමින් රඳවා තබාගනු. නැතහොත් ඔවුන්ව උචිත අන්දමින් පිටත් කර යවනු. එහෙත් නුඹලා සීමාව ඉක්මවන්නන් වනු පිණිස ඔවුන්ව වැරදි අන්දමින් රඳවා නොතබනු. තවද කවුරුන් හෝ එසේ කරන්නේද, නියතවශයෙන්ම ඔහු තම ආත්මයට හානි කර ගන්නේය. තවද නුඹලා අල්ලාහ්ගේ විධානයන් උපහාසයට ලක් නොකරනු. තවද අල්ලාහ්ගෙන් නුඹලා වෙත වූ අනුග්‍රහයද, ඔහු නුඹලා වෙත පහළ කළ ග්‍රන්ථයද, ප්‍රඥාවද, එමගින් ඔහු නුඹලාට කරන්නාවූ අනුශාසනා සිහිපත් කරනු. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද අල්ලාහ් සියළු දේ මැනැවින් දන්නේ යැයි දැනගනු.

وَاِذَا طَلَّقْتُمُ النِّسَآءَ فَبَلَغْنَ اَجَلَهُنَّ فَلَا
تَعْضُلُوْهُنَّ اَنْ يَّنْكِحْنَ اَزْوَاجَهُنَّ اِذَا
تَرَاضَوْا بَيْنَهُمْ بِالْمَعْرُوْفِ ؕ ذٰلِكَ
يُوْعَظُ بِهٖ مَنْ كَانَ مِنْكُمْ يُؤْمِنُ بِاللّٰهِ
وَالْيَوْمِ الْاٰخِرِ ؕ ذٰلِكُمْ اَزْكٰى لَكُمْ

233. තවද නුඹලා ස්ත්‍රීන්ව දික්කසාද කර ඔවුන්, තමන්ගේ නියමිත වාරයේ අවසානයට ළඟා වනවිට, ඔවුන් විනීත අයුරින් එකිනෙකා සමඟ එකඟත්වයට පැමිණෙන්නේ නම්, ඔවුන්ගේ සැමියන්ව ඔවුන් සරණපාවා ගැනීමෙන් නුඹලා ඔවුන්ව නොවළක්වනු. නුඹලා අතරින් අල්ලාහ් කෙරෙහිද අවසන් දිනය කෙරෙහිද විශ්වාස කරන අයට මෙය අනුශාසනාවකි. මෙය නුඹලාට වඩාත් ආශිර්වාදිත මෙන්ම වඩාත් පාරිශුද්ධ

◆ අවලංගු කළ හැකි දික්කසාදය

වේ. තවද අල්ලාහ් දන්නේය, එහෙත් නුඹලා නොදන්නෙහුය.

وَاَطْهَرُ ۗ وَاللّٰهُ يَعْلَمُ وَاَنْتُمْ لَا تَعْلَمُوْنَ ﴿٢٣٣﴾

234. තවද මව්වරුන් ඔවුන්ගේ දරුවන්ට පුරා වසර දෙකක් කිරි පෙවිය යුතුය. (මෙය) කිරි පෙවීම සම්පූර්ණ කිරීමට කැමැති අය සඳහා වේ. තවද ඔවුන්ගේ (මව්වරුන්ගේ) භාවිතයට අනුව ආහාර සහ ඇඳුම් යනාදියෙහි වගකීම දරුවා අයත් පුරුෂයා සතු වේ. කිසිඳු ප්‍රාණයකට එහි හැකියාවට වඩා බරක් නොපැටවෙනු ඇත. මව ඇයගේ දරුවා හේතුවෙන් (පියාට) හිරිහැර නොකළ යුතු අතර දරුවා අයත් ඔහුද, ඔහුගේ දරුවා හේතුවෙන් (මවට) හිරිහැර නොකළ යුතුය. තවද එවැන්නක්ම (කිරීම) උරුමක්කාරයින් කෙරෙහි යුතුකමක් වේ. ඔවුන් දෙදෙනාම අන්‍යෝන්‍ය ලෙස එකඟව් සාකච්ඡා කොට කිරි වැරවීමට කැමති වුවහොත් ඔවුන් මත වරදක් නොවනු ඇත. තවද නුඹලා නුඹලාගේ දරුවන් සඳහා කිරි මවක් යොදවන්නට කැමැති වන්නේ නම්, නුඹලා ගෙවීමට පොරොන්දු වූ දේ නුඹලා සාධාරණ ලෙස ගෙවන්නේ නම් නුඹලා කෙරෙහි වරදක් නොවනු ඇත. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද නුඹලා කරන දේ අල්ලාහ් දකින බව දැනගනු.

وَالْوَالِدٰتُ يُرْضِعْنَ اَوْلَادَهُنَّ حَوْلَيْنِ كَامِلَيْنِ لِمَنْ اَرَادَ اَنْ يُّتِمَّ الرَّضَاعَةَ ۗ وَعَلَى الْمَوْلُوْدِ لَهٗ رِزْقُهُنَّ وَكِسْوَتُهُنَّ بِالْمَعْرُوْفِ ۗ لَا تُكَلَّفُ نَفْسٌ اِلَّا وُسْعَهَا ۚ لَا تُضَاۤرَّ وَالِدَةٌ ۢ بِوَلَدِهَا وَلَا مَوْلُوْدٌ لَّهٗ بِوَلَدِهٖ ۚ وَعَلَى الْوَارِثِ مِثْلُ ذٰلِكَ ۚ فَاِنْ اَرَادَا فِصَالًا عَنْ تَرَاضٍ مِّنْهُمَا وَتَشَاوُرٍ فَلَا جُنَاحَ عَلَيْهِمَا ۗ وَاِنْ اَرَدْتُّمْ اَنْ تَسْتَرْضِعُوْٓا اَوْلَادَكُمْ فَلَا جُنَاحَ عَلَيْكُمْ اِذَا سَلَّمْتُمْ مَّآ اٰتَيْتُمْ بِالْمَعْرُوْفِ ۗ وَاتَّقُوا اللّٰهَ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿٢٣٤﴾

235. තවද නුඹලාගෙන් කවුරුන් හෝ මරණයට පත්ව් භාර්යාවන් හැර යන්නේද, මොවුන් (භාර්යාවන්) තමන්වම මාස හතරක් සහ (දින) දහයක් රඳවා ගත යුතුය. තවද ඔවුන් තමන්ගේ වාරයෙහි අවසානයට ලඟා වුයේ නම්, ඔවුන් පිළිබඳව සාධාරණ අන්දමින් ඔවුන් යමක් කළේ නම්, එයින් නුඹලා කෙරෙහි පවක් නොපැවරේ. තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් විමසිලිමත්ය.

وَالَّذِيْنَ يُتَوَفَّوْنَ مِنْكُمْ وَيَذَرُوْنَ اَزْوَاجًا يَّتَرَبَّصْنَ بِاَنْفُسِهِنَّ اَرْبَعَةَ اَشْهُرٍ وَّعَشْرًا ۚ فَاِذَا بَلَغْنَ اَجَلَهُنَّ فَلَا جُنَاحَ عَلَيْكُمْ فِيْمَا فَعَلْنَ فِيْٓ اَنْفُسِهِنَّ بِالْمَعْرُوْفِ ۗ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ خَبِيْرٌ ﴿٢٣٥﴾

وَلَا جُنَاحَ عَلَيْكُمْ فِيمَا عَرَّضْتُم بِهِ مِنْ
خِطْبَةِ النِّسَاءِ أَوْ أَكْنَنتُمْ فِي أَنفُسِكُمْ ۚ
عَلِمَ اللَّهُ أَنَّكُمْ سَتَذْكُرُونَهُنَّ وَلَٰكِن لَّا
تُوَاعِدُوهُنَّ سِرًّا إِلَّا أَن تَقُولُوا قَوْلًا
مَّعْرُوفًا ۚ وَلَا تَعْزِمُوا عُقْدَةَ النِّكَاحِ
حَتَّىٰ يَبْلُغَ الْكِتَابُ أَجَلَهُ ۚ وَاعْلَمُوا أَنَّ
اللَّهَ يَعْلَمُ مَا فِي أَنفُسِكُمْ فَاحْذَرُوهُ ۚ
وَاعْلَمُوا أَنَّ اللَّهَ غَفُورٌ حَلِيمٌ ﴿٢٣٦﴾

236. තවද (මෙම) ස්ත්‍රීන් හට විවාහ යෝජනාවක් පිළිබඳව ඇඟවීමෙන් හෝ නුඹලාගේ සිත්තුල (කැමැත්ත) තබාගැනීමෙන් හෝ නුඹලා කෙරෙහි වරදක් නැත. (මේ සම්බන්ධයෙන්) නුඹලා ඔවුන් ගැන සිතන බව අල්ලාහ් දන්නේය. නමුත් නුඹලා යහපත් වදනක් පැවසීම හැරෙන්නට ඔවුන් සමඟ රහසිගත ගිවිසුමක් ඇති නොකළ යුතුය. තවද නියමිත වාරයේ අවසානයට ළඟා වන තෙක් විවාහ බන්ධනය සඳහා තිරණයකට නොඑළඹෙනු. තවද නුඹලාගේ සිත්හි ඇති දේ අල්ලාහ් දැන සිටින බව දැනගනු. එබැවින් නුඹලා එයින් ප්‍රවේශම් වනු. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, ඉවසිලිවන්තය යන්න දැනගනු.

لَّا جُنَاحَ عَلَيْكُمْ إِن طَلَّقْتُمُ النِّسَاءَ مَا
لَمْ تَمَسُّوهُنَّ أَوْ تَفْرِضُوا لَهُنَّ فَرِيضَةً ۚ
وَمَتِّعُوهُنَّ عَلَى الْمُوسِعِ قَدَرُهُ وَعَلَى
الْمُقْتِرِ قَدَرُهُ مَتَاعًا بِالْمَعْرُوفِ ۖ حَقًّا
عَلَى الْمُحْسِنِينَ ﴿٢٣٧﴾

237. තවද නුඹලා ඔවුන්ව ස්පර්ශ කර නොමැති විටදී හෝ ඔවුන් සඳහා මහර් (ස්ත්‍රියට දිය යුතු දේ) නියම කර නොමැති විටදී හෝ නුඹලා ස්ත්‍රීන්ව දික්කසාද කිරීම නුඹලා කෙරෙහි පවක් නැත. එහෙත් පොහොසත් මිනිසා ඔහුගේ වත්කම අනුව ද දුප්පත් මිනිසා ඔහුගේ වත්කම අනුව ද ඔවුන්ට සැපයිය යුතු වේ. (මෙය) යහපත් අන්දමේ ජීවනෝපායක්ය, (මෙය) සුචරිතවත් අය කෙරෙහි යුතුකමක්ද වන්නේය.

وَإِن طَلَّقْتُمُوهُنَّ مِن قَبْلِ أَن تَمَسُّوهُنَّ
وَقَدْ فَرَضْتُمْ لَهُنَّ فَرِيضَةً فَنِصْفُ مَا
فَرَضْتُمْ إِلَّا أَن يَعْفُونَ أَوْ يَعْفُوَ الَّذِي
بِيَدِهِ عُقْدَةُ النِّكَاحِ ۚ وَأَن تَعْفُوا أَقْرَبُ
لِلتَّقْوَىٰ ۚ وَلَا تَنسَوُا الْفَضْلَ بَيْنَكُمْ ۚ

238. තවද නුඹලා ඔවුන්ව ස්පර්ශ කිරීමට පෙර, ඔවුන්ට මහර් (ස්ත්‍රියට දිය යුතු දේ) නියම කර ඇති විටදී, නුඹලා ඔවුන්ව දික්කසාද කරන්නේ නම්, ඔවුන් සමාව දෙන්නේ නම්, නැතහොත් විවාහ බන්ධනය කවුරුන් අතෙහි වේද, ඔහු සමාව දුන්නේ නම් හෝ මිස නුඹලා ගෙවූ මහර් (ස්ත්‍රියට දිය යුතු දේ) වලින් හරි අඩක් (නුඹලාගෙන් අයවිය යුතු)වේ. තවද නුඹලා සමාවදීම බියබැතිමත් කමට ඉතා සමීපය. තවද එකිනෙකාට යහකම් කිරීමට අමතක නොකරනු.

إِنَّ ٱللَّهَ بِمَا تَعْمَلُونَ بَصِيرٌ ﴿٢٣٨﴾

නියතවශයෙන්ම නුඹලා කරන දේ අල්ලාහ් දකින්නේය.

حَٰفِظُوا۟ عَلَى ٱلصَّلَوَٰتِ وَٱلصَّلَوٰةِ ٱلْوُسْطَىٰ وَقُومُوا۟ لِلَّهِ قَٰنِتِينَ ﴿٢٣٩﴾

239. නමස්කාරයන්ද, තවද අතරතුර නමස්කාරයන්ද රකිනු. තවද අල්ලාහ් ඉදිරියෙහි යටහත් භාවයෙන් සිටගනු.

فَإِنْ خِفْتُمْ فَرِجَالًا أَوْ رُكْبَانًا ۖ فَإِذَآ أَمِنتُمْ فَٱذْكُرُوا۟ ٱللَّهَ كَمَا عَلَّمَكُم مَّا لَمْ تَكُونُوا۟ تَعْلَمُونَ ﴿٢٤٠﴾

240. නුඹලා භයානක තත්ත්වයක සිටින්නේ නම්, පා ගමනෙහි හෝ පුවාහනයෙහි (නුඹලාගේ නමස්කාරයන් ඉටුකරනු.) නමුත් නුඹලා සුරක්ෂිතව සිටින විටදී, නුඹලා නොදත් දේ ඔහු නුඹලාට ඉගැන්වූ පරිදිම අල්ලාහ්ව සිහිපත් කරනු.

وَٱلَّذِينَ يُتَوَفَّوْنَ مِنكُمْ وَيَذَرُونَ أَزْوَٰجًا وَصِيَّةً لِّأَزْوَٰجِهِم مَّتَٰعًا إِلَى ٱلْحَوْلِ غَيْرَ إِخْرَاجٍ ۚ فَإِنْ خَرَجْنَ فَلَا جُنَاحَ عَلَيْكُمْ فِى مَا فَعَلْنَ فِىٓ أَنفُسِهِنَّ مِن مَّعْرُوفٍ ۗ وَٱللَّهُ عَزِيزٌ حَكِيمٌ ﴿٢٤١﴾

241. තවද නුඹලාගෙන් කවුරුන් හෝ මරණයට පත්වී භාර්යාවන් හැර යන්නේ නම්, ඔවුන් තමන්ගේ භාර්යාවන්ට, (ඔවුන්ව) පිටමං කර නොහැර වසරකට යැපීම සඳහා වසියයත් (අවසන් කැමැති පත්‍රයෙන්) ප්‍රකාශ කළ යුතුය. එහෙත් ඔවුන් (තමන් විසින්ම) පිටත්වී යන්නේ නම්, ඔවුන් තමන් සම්බන්ධයෙන් යම් සුදුසු දෙයක් කිරීම පිළිබඳව නුඹලා කෙරෙහි පවක් නැත. තවද අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَلِلْمُطَلَّقَٰتِ مَتَٰعٌۢ بِٱلْمَعْرُوفِ ۖ حَقًّا عَلَى ٱلْمُتَّقِينَ ﴿٢٤٢﴾

242. තවද දික්කසාද කරනු ලැබූ ස්ත්‍රීන් සඳහා(ද), සාධාරණත්වයට අනුව ජීවනෝපායක් තිබිය යුතු වේ. (මෙය) දෙවියන්ට බිය ඇත්තවුන් කෙරෙහි යුතුකමකි.

كَذَٰلِكَ يُبَيِّنُ ٱللَّهُ لَكُمْ ءَايَٰتِهِۦ لَعَلَّكُمْ تَعْقِلُونَ ﴿٢٤٣﴾ ع ٣١ ٧ ١٥

243. නුඹලා වටහාගනු පිණිස අල්ලාහ් ඔහුගේ විධානයන් මෙලෙස නුඹලාට පහදා දෙන්නේය.

أَلَمْ تَرَ إِلَى ٱلَّذِينَ خَرَجُوا۟ مِن دِيَٰرِهِمْ وَهُمْ أُلُوفٌ حَذَرَ ٱلْمَوْتِ فَقَالَ لَهُمُ

244. මරණයට බිය වෙමින්, තම නිවැස්වලින් බැහැර ගිය දහස් ගණන් අය ගැන ඔබ නොදන්නෙහිද? තවද "මැරෙනු." යි අල්ලාහ් ඔවුනට කීවේය. පසුව ඔහු ඔවුනට ජීවය ලබා

اللّٰهُ مُوْتُوْا ثُمَّ اَحْيَاهُمْ ۗ اِنَّ اللّٰهَ لَذُوْ فَضْلٍ عَلَى النَّاسِ وَلٰكِنَّ اَكْثَرَ النَّاسِ لَا يَشْكُرُوْنَ ﴿٢٤٤﴾

දුන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් මිනිසුන් කෙරෙහි ඉතාමත් ත්‍යාගවන්තය, එහෙත් බොහෝ මිනිසුන් කෘතඥ නොවෙති.

وَقَاتِلُوْا فِيْ سَبِيْلِ اللّٰهِ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ سَمِيْعٌ عَلِيْمٌ ﴿٢٤٥﴾

245. තවද නුඹලා අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කරනු. තවද අල්ලාහ් සියල්ල අසන්නා මෙන්ම සියල්ල දන්නා බව දැනගනු.

مَنْ ذَا الَّذِيْ يُقْرِضُ اللّٰهَ قَرْضًا حَسَنًا فَيُضٰعِفَهٗ لَهٗٓ اَضْعَافًا كَثِيْرَةً ۗ وَاللّٰهُ يَقْبِضُ وَيَبْصُۜطُ ۖ وَاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٢٤٦﴾

246. අල්ලාහ්ට යහපත් ණයක් ලබා දෙන්නේ කවරෙක්ද?, ඒ වෙනුවෙන් ඔහු එය කිහිප ගුණයකින් වැඩි කර ඔහුට ලබාදෙන්නේය. තවද අල්ලාහ් (ධනය) ලබාගෙන, වැඩිවීමට සලස්වයි. තවද නුඹලා ඔහු වෙතම ආපසු පමුණුවනු ලබන්නෙහුය.

اَلَمْ تَرَ اِلَى الْمَلَاِ مِنْۢ بَنِيْٓ اِسْرَآءِيْلَ مِنْۢ بَعْدِ مُوْسٰى ۘ اِذْ قَالُوْا لِنَبِيٍّ لَّهُمُ ابْعَثْ لَنَا مَلِكًا نُّقَاتِلْ فِيْ سَبِيْلِ اللّٰهِ ۗ قَالَ هَلْ عَسَيْتُمْ اِنْ كُتِبَ عَلَيْكُمُ الْقِتَالُ اَلَّا تُقَاتِلُوْا ۗ قَالُوْا وَمَا لَنَآ اَلَّا نُقَاتِلَ فِيْ سَبِيْلِ اللّٰهِ وَقَدْ اُخْرِجْنَا مِنْ دِيَارِنَا وَاَبْنَآئِنَا ۗ فَلَمَّا كُتِبَ عَلَيْهِمُ الْقِتَالُ تَوَلَّوْا اِلَّا قَلِيْلًا مِّنْهُمْ ۗ وَاللّٰهُ عَلِيْمٌۢ بِالظّٰلِمِيْنَ ﴿٢٤٧﴾

247. මූසාගෙන් පසු ඉස්රාඊල් දරුවන්ගේ ප්‍රධානීන් ගැන ඔබ අසා තිබේද? ඔවුන් ඔවුන්ගේ වක්තෘවරයෙකු වෙත අප අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කිරීම සඳහා අප වෙනුවෙන් රජ කෙනෙකු පත්කර දෙන්නැ'යි කියූ විට, නුඹලා කෙරෙහි සටන් කිරීම අනිවාර්යය කරනු ලැබුවේ නම්, නුඹලා සටන් නොකර සිටින්නෙහුදැ?'යි ඔහු (වක්තෘවරයා) කීවේය. අපව අපගේ නිවැස්වලින්ද අපගේ පිරිමි දරුවන්ගෙන්ද පලවා හැර සිටියදී අප අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් නොකර වැළකී සිටීමට අපට කුමක් සිදුවී ඇත්දැ?'යි ඔවුහු කීහ. එහෙත් සටන් කිරීම ඔවුන්ට අනිවාර්යය කරනු ලැබූ විටදී ඔවුන්ගෙන් සුළු පිරිසක් හැර අන් අය හැරී ගියහ. තවද සීමාව ඉක්මවන්නන්ව අල්ලාහ් මැනැවින් දන්නේය.

وَقَالَ لَهُمْ نَبِيُّهُمْ اِنَّ اللّٰهَ قَدْ بَعَثَ

248. තවද අල්ලාහ් නුඹලා සඳහා තාලූත්ව රජෙකු ලෙස පත් කර

ඇත්තේයැ'යි ඔවුන්ගේ වක්තෘවරයා ඔවුනට පැවසීය. 'රජකම සඳහා ඔහුට වඩා අපි හිමිකම් ලබා තිබියදී ඔහු අප කෙරෙහි ආධිපත්‍යය ලබන්නේ කෙසේද? තවද ඔහුට වස්තුවේ බහුලත්වය දෙනු නොලැබු වේයැ'යි ඔවුහු කීහ. 'නියතවශයෙන්ම නුඹලාට ඉහලින් අල්ලාහ් ඔහුව තෝරාගෙන ඥානයෙන්ද, ශරීර ශක්තියෙන්ද ඔහුට බහුලව පිරිනමා ඇතැ'යි ඔහු කීවේය. තවද අල්ලාහ් ඔහු කැමැති කෙනෙකුට ආධිපත්‍යය දෙන්නේය. තවද අල්ලාහ් සමෘධි සම්පන්නය, සියල්ල දත්තාය.

لَكُمْ طَالُوْتَ مَلِكًا ۗ قَالُوْٓا اَنّٰى يَكُوْنُ
لَهُ الْمُلْكُ عَلَيْنَا وَنَحْنُ اَحَقُّ بِالْمُلْكِ مِنْهُ
وَلَمْ يُؤْتَ سَعَةً مِّنَ الْمَالِ ۗ قَالَ اِنَّ اللّٰهَ
اصْطَفٰىهُ عَلَيْكُمْ وَزَادَهٗ بَسْطَةً فِى الْعِلْمِ
وَالْجِسْمِ ۗ وَاللّٰهُ يُؤْتِىْ مُلْكَهٗ مَنْ يَّشَآءُ ۗ
وَاللّٰهُ وَاسِعٌ عَلِيْمٌ ﴿٢٤٨﴾

249. තවද ඔවුන්ගේ වක්තෘවරයා ඔවුනට (මෙසේ) පැවසුවේය. 'ඔහුගේ ආධිපත්‍යයට සළකුණක් නම්, නුඹලාට පෙට්ටගමක් පැමිණෙනු ඇත. එහි නුඹලාගේ අධිපතියාණන්ගෙන් ශාන්තිය ලැබෙන අතර මුසාගේ පෙළපතින්ද හාරුන්ගේ පෙළපතින්ද හැර ගිය (යහපත්) දේ වනු ඇත. තවද සුරදූතයින් එය උසුලා සිටින්නෙහුය. නුඹලා විශ්වාසවන්තයින් නම් නියත වශයෙන්ම නුඹලාට එහි සළකුණක් ඇත.'

وَقَالَ لَهُمْ نَبِيُّهُمْ اِنَّ اٰيَةَ مُلْكِهٖٓ اَنْ
يَّاْتِيَكُمُ التَّابُوْتُ فِيْهِ سَكِيْنَةٌ مِّنْ رَّبِّكُمْ
وَبَقِيَّةٌ مِّمَّا تَرَكَ اٰلُ مُوْسٰى وَاٰلُ هٰرُوْنَ
تَحْمِلُهُ الْمَلٰٓئِكَةُ ۗ اِنَّ فِىْ ذٰلِكَ لَاٰيَةً لَّكُمْ
اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ﴿٢٤٩﴾ ع

250. තවද තාලූත් තම සේනාව සමඟ පිටත්වූ කල්හි, ඔහු (මෙසේ) පැවසුවේය. 'නියතවශයෙන්ම අල්ලාහ් නුඹලාව ගංගාවක් මගින් පිරික්සනු ඇත. එබැවින් යමෙක් එයින් පානය කරයිද, ඔහු මාගෙන් කෙනෙක් නොවේ. එහෙත් තමන්ගේ අත්ලෙන් ජලය ස්වල්පයක් හැර (අධික ලෙස) රස නොබලන්නන් සැබැවින්ම මාගෙන් කෙනෙක් වන්නේය.' එහෙත් ඔවුන්ගෙන් ස්වල්ප දෙනෙකු හැර (අන් අය) එයින් පානය කළහ. එමෙන්ම ඔහුද, ඔහු සමඟ විශ්වාස කළ අයද ඔවුන් එයින් එතෙර වූ කල්හි, 'ජාලූත් හා ඔහුගේ සේනාවන්ට එරෙහිව අද දින අපට බලයක් නැතැ.'යි (අවනත නොවූ)

فَلَمَّا فَصَلَ طَالُوْتُ بِالْجُنُوْدِ ۙ قَالَ اِنَّ
اللّٰهَ مُبْتَلِيْكُمْ بِنَهَرٍ ۚ فَمَنْ شَرِبَ مِنْهُ
فَلَيْسَ مِنِّىْ ۚ وَمَنْ لَّمْ يَطْعَمْهُ فَاِنَّهٗ مِنِّىْٓ
اِلَّا مَنِ اغْتَرَفَ غُرْفَةًۢ بِيَدِهٖ ۚ فَشَرِبُوْا
مِنْهُ اِلَّا قَلِيْلًا مِّنْهُمْ ۗ فَلَمَّا جَاوَزَهٗ هُوَ
وَالَّذِيْنَ اٰمَنُوْا مَعَهٗ ۙ قَالُوْا لَا طَاقَةَ
لَنَا الْيَوْمَ بِجَالُوْتَ وَجُنُوْدِهٖ ۗ قَالَ

ඔවුහු කීහ. නමුත්, (එක් දිනකදී) නිශ්චිතවම අල්ලාහ්ව ඔවුන් හමුවන්නේ යැයි ස්ථිර ලෙස දැන සිටි අය (මෙසේ) කීහ. 'අල්ලාහ්ගේ විධානයන් මගින් කොතරම් සුළු පිරිස් විශාල පිරිස් කෙරෙහි ජයග්‍රහණය කර තිබේද'! තවද අල්ලාහ් ඉවසිලිවන්තයින් සමඟ සිටින්නේය.

الَّذِيْنَ يَظُنُّوْنَ اَنَّهُمْ مُّلٰقُوا اللّٰهِ ۙ كَمْ مِّنْ فِئَةٍ قَلِيْلَةٍ غَلَبَتْ فِئَةً كَثِيْرَةً ۢ بِاِذْنِ اللّٰهِ ؕ وَاللّٰهُ مَعَ الصّٰبِرِيْنَ ﴿٢٥٠﴾

251. තවද ඔවුහු ජාලූත්ට හා ඔහුගේ සේනාවන් වෙත (මුහුණ දීමට) පිටත්වූ කල්හි, 'අපගේ අධිපතියාණෙනි! අප හට ස්ථිරසාරකම ලබා දෙනු මැනව, තවද අපගේ පාදයන් ස්ථාවර කරනු මැනව. තවද අවිශ්වාසිතයින්ට එරෙහිව අපට උදව් කරනු මැනවැ'යි ඔවුහු කීහ.

وَلَمَّا بَرَزُوْا لِجَالُوْتَ وَجُنُوْدِهٖ قَالُوْا رَبَّنَاۤ اَفْرِغْ عَلَيْنَا صَبْرًا وَّثَبِّتْ اَقْدَامَنَا وَانْصُرْنَا عَلَى الْقَوْمِ الْكٰفِرِيْنَ ؕ ﴿٢٥١﴾

252. එබැවින් අල්ලාහ්ගේ විධානයෙන් මොවුහු ඔවුන්ව මුලිනුපුටා දැමූහ. තවද දාවූද් ජාලූත්ව ඝාතනය කළේය. තවද මිනිසුන්ගෙන් සමහරෙකුව තවත් සමහරෙකු ලවා අල්ලාහ්ගේ පලවා හැරීම නොවන්නට, පොළොව කෝලාහලයෙන් පිරී යන්නට තිබිණ. නමුත් අල්ලාහ් (සියලු) මිනිසුන් හට අතිශයින්ම ත්‍යාගශීලිය.

فَهَزَمُوْهُمْ بِاِذْنِ اللّٰهِ ۙ۫ وَقَتَلَ دَاوٗدُ جَالُوْتَ وَاٰتٰىهُ اللّٰهُ الْمُلْكَ وَالْحِكْمَةَ وَعَلَّمَهٗ مِمَّا يَشَاۤءُ ؕ وَلَوْلَا دَفْعُ اللّٰهِ النَّاسَ بَعْضَهُمْ بِبَعْضٍ ۙ لَّفَسَدَتِ الْاَرْضُ وَلٰكِنَّ اللّٰهَ ذُوْ فَضْلٍ عَلَى الْعٰلَمِيْنَ ﴿٢٥٢﴾

253. අල්ලාහ්ගේ සළකුණු මේවාය. අපි ඒවා සත්‍යයෙන් යුතුව ඔබ හට කියවන්නෙමු. නියතවශයෙන්ම ඔබ දූතයින්ගෙන් (එක්) කෙනෙකි.

تِلْكَ اٰيٰتُ اللّٰهِ نَتْلُوْهَا عَلَيْكَ بِالْحَقِّ ؕ وَاِنَّكَ لَمِنَ الْمُرْسَلِيْنَ ﴿٢٥٣﴾

3 කොටස

254. දූතයින් මොවුන්ය. මොවුන්ගෙන් සමහරුන්ව තවත් සමහරුන්ට වඩා අපි විශිෂ්ඨ කළෙමු. අල්ලාහ් කථා කළ◆ අයද මොවුනතර වෙති. තවද ඔහු මොවුන්ගෙන් සමහරුන්ගේ තරාතිරම් උසස් කොට ඇත්තේය. තවද අපි මර්යම් ගේ පුත් ඊසාට පැහැදිලි සාධක ලබාදී ශුද්ධවූ

الجزء ٣

تِلْكَ الرُّسُلُ فَضَّلْنَا بَعْضَهُمْ عَلٰى بَعْضٍ ۘ مِنْهُمْ مَّنْ كَلَّمَ اللّٰهُ وَرَفَعَ بَعْضَهُمْ دَرَجٰتٍ ؕ وَاٰتَيْنَا عِيْسَى ابْنَ

◆ ඔවුන්ට නව නීති මාලාවක් දුන්නේය.

مَرْيَمَ الْبَيِّنٰتِ وَاَيَّدْنٰهُ بِرُوْحِ الْقُدُسِ ؕ
وَلَوْ شَآءَ اللّٰهُ مَا اقْتَتَلَ الَّذِيْنَ مِنْۢ
بَعْدِهِمْ مِّنْۢ بَعْدِ مَا جَآءَتْهُمُ الْبَيِّنٰتُ
وَلٰكِنِ اخْتَلَفُوْا فَمِنْهُمْ مَّنْ اٰمَنَ
وَمِنْهُمْ مَّنْ كَفَرَ ؕ وَلَوْ شَآءَ اللّٰهُ مَا
اقْتَتَلُوْا ۙ وَلٰكِنَّ اللّٰهَ يَفْعَلُ مَا يُرِيْدُ ﴿٢٥٤﴾

*ආත්මයෙන් ඔහුව අපි ශක්තිමත් කළෙමු. තවද අල්ලාහ් කැමති වූයේ නම් ඔවුන්ට පසුව (පැමිණි) අය ඔවුන්ට පැහැදිලි සළකුණු පැමිණි පසුවද ඔවුනොවුන් අතර සටන් නොවදින්නට තිබුණි. නමුත් ඔවුහු එකඟ නොවූහ. ඔවුන්ගෙන් සමහරු විශ්වාස කළහ, තවද ඔවුන්ගෙන් සමහරු අවිශ්වාස කළහ. තවද අල්ලාහ් (එසේ) කැමති වූයේ නම්, ඔවුන් එකිනෙකා සමඟ සටන් නොකරන්නට තිබුණි. එහෙත් අල්ලාහ් ඔහු කැමැති දේම කරන්නේය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اَنْفِقُوْا مِمَّا رَزَقْنٰكُمْ
مِّنْ قَبْلِ اَنْ يَّاْتِيَ يَوْمٌ لَّا بَيْعٌ فِيْهِ وَلَا خُلَّةٌ
وَّلَا شَفَاعَةٌ ؕ وَالْكٰفِرُوْنَ هُمُ
الظّٰلِمُوْنَ ﴿٢٥٥﴾

255. එම්බල විශ්වාසිතයිනි! කිසිඳු ගණුදෙනුවක් නොමැති, කිසිඳු මිතුරුකමක් නොමැති, කිසිඳු මැදිහත්වීමක්ද නොමැති එම දිනය පැමිණීමට පෙර, අප නුඹලාට දුන් දෙයින් වැය කරනු. (තමන්ටම) වැරදි කරන්නන් වන්නේ අවිශ්වාස කරන්නන්මය.

اَللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ ۚ اَلْحَىُّ الْقَيُّوْمُ ۚ لَا
تَاْخُذُهٗ سِنَةٌ وَّلَا نَوْمٌ ؕ لَهٗ مَا فِى السَّمٰوٰتِ
وَمَا فِى الْاَرْضِ ؕ مَنْ ذَا الَّذِىْ يَشْفَعُ عِنْدَهٗۤ
اِلَّا بِاِذْنِهٖ ؕ يَعْلَمُ مَا بَيْنَ اَيْدِيْهِمْ وَمَا
خَلْفَهُمْ ۚ وَلَا يُحِيْطُوْنَ بِشَىْءٍ مِّنْ عِلْمِهٖۤ
اِلَّا بِمَا شَآءَ ۚ وَسِعَ كُرْسِيُّهُ السَّمٰوٰتِ

256. අල්ලාහ්, ඔහු හැර නැමදීමට සුදුස්සෙක් නොමැත, ජීවමානය, ස්වයං ස්ථායිය, සියල්ල පැවතිමට සළස්වන්නාය. මඳ නින්ද හෝ නින්ද ඔහුව ග්‍රහණය නොකරයි. අහස්හි ඇති සියළු දේ ද, පොළොවෙහි ඇති සියළු දේ ද ඔහු සතුය. ඔහුගේ අවසරයෙන් මිස ඔහු වෙත මැදිහත් වනුයේ කවරෙක්ද? ඔවුනට ඉදිරියෙන් ඇති දේ ද, ඔවුනට පිටුපසින් ඇති දේ ද, ඔහු දනියි. ඔහුගේ කැමැත්තෙන් හැර ඔහුගේ දැනුමෙන් කිසිවක් ඔවුනට ලබාගන්නට නොහැකිය. ඔහුගේ සිහසුන අහස්හිද පොළොවෙහිද

*සටහන. 254: මෙම වාක්‍යය ( مِنْهُمْ ) 'මින්හුම්' යන වචනයට පෙර නොව් පසුව විරාමයක් දීමෙන්ද පරිවර්ථනය කළ හැකිය. මෙවන් ආකාරයට කළහොත් මෙම පරිවර්ථනය ඉතා පහසුවෙන් කියවීමටත් තේරුම් ගැනීමටත් හැකිවේ. එය මෙසේය. 'අපි සමහරුන්ව සමහරුන්ට වඩා උසස් කළ දූතයින් මොවුන්ය. තවද අල්ලාහ් ඔවුන්ට කථා කළේය. තවද ඔවුන්ගෙන් සමහරුන්ව සමහරුන්ට වඩා තරාතිරමින් උසස් කළේය'.

وَالْأَرْضَ ۖ وَلَا يَئُودُهُ حِفْظُهُمَا ۚ وَهُوَ الْعَلِيُّ الْعَظِيمُ ﴿٢٥٦﴾

*පැතිරී ඇත. තවද ඒවා රැකගැනීම ඔහුව වෙහෙසට පත් නොකරයි. තවද ඔහු අති උසස්ය, අති ශ්‍රේෂ්ඨය.

لَا إِكْرَاهَ فِي الدِّينِ ۖ قَد تَّبَيَّنَ الرُّشْدُ مِنَ الْغَيِّ ۚ فَمَن يَكْفُرْ بِالطَّاغُوتِ وَيُؤْمِن بِاللَّهِ فَقَدِ اسْتَمْسَكَ بِالْعُرْوَةِ الْوُثْقَىٰ لَا انفِصَامَ لَهَا ۗ وَاللَّهُ سَمِيعٌ عَلِيمٌ ﴿٢٥٧﴾

257. ආගමෙහි කිසිදු බලකිරීමක් නොමැත. නියතවශයෙන්ම නිවැරදි දේ වැරදි දෙයින් ප්‍රත්‍යක්ෂ වී ඇත. එබැවින් කවුරුන් හෝ සීමාව ඉක්මවන්නන්ගේ මගපෙන්වීම ප්‍රතික්ෂේප කරමින් අල්ලාහ් කෙරෙහි විශ්වාස කරන්නේද, නියතවශයෙන්ම ඔහු නොකැඩෙන්නාවූ ශක්තිමත් මිටක් දැඩිව ග්‍රහණය කර ගත්තේය. තවද අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දන්නාය.

اللَّهُ وَلِيُّ الَّذِينَ آمَنُوا يُخْرِجُهُم مِّنَ الظُّلُمَاتِ إِلَى النُّورِ ۖ وَالَّذِينَ كَفَرُوا أَوْلِيَاؤُهُمُ الطَّاغُوتُ يُخْرِجُونَهُم مِّنَ النُّورِ إِلَى الظُّلُمَاتِ ۗ أُولَٰئِكَ أَصْحَابُ النَّارِ ۖ هُمْ فِيهَا خَالِدُونَ ﴿٢٥٨﴾

258. අල්ලාහ් විශ්වාස කරන අයගේ මිතුරාය. ඔහු ඔවුන්ව සියළු (වර්ගයේ) අන්ධකාරයන්ගෙන් ආලෝකය වෙතට ගෙන එන්නේය. තවද අවිශ්වාස කරන අයගේ මිතුරන් සීමාව ඉක්මවන්නන්ය. මොවුහු ඔවුන්ව ආලෝකයෙන් සියළු (වර්ගයේ) අන්ධකාරයන් වෙතට ගෙන එන්නෝය. මොවුහු ගින්නෙහි සහකරුවන්ය. මොවුහු එහිම වෙසෙන්නෝය.

أَلَمْ تَرَ إِلَى الَّذِي حَاجَّ إِبْرَاهِيمَ فِي رَبِّهِ أَنْ آتَاهُ اللَّهُ الْمُلْكَ إِذْ قَالَ إِبْرَاهِيمُ رَبِّيَ الَّذِي يُحْيِي وَيُمِيتُ قَالَ أَنَا أُحْيِي وَأُمِيتُ ۖ قَالَ إِبْرَاهِيمُ فَإِنَّ اللَّهَ يَأْتِي بِالشَّمْسِ مِنَ الْمَشْرِقِ فَأْتِ بِهَا مِنَ

259. අල්ලාහ් ඔහුට රාජධානිය දුන් බැවින් ඉබ්රාහීම් සමඟ එතුමාගේ අධිපතියාණන් සම්බන්ධයෙන් තර්ක කළ ඔහු ගැන ඔබ අසා නැත්ද? 'ජීවය දෙන්නේද, මරණය දෙන්නේද මාගේ අධිපතියාණන්යැ'යි ඉබ්රාහීම් පැවසූ කල්හි, 'මමද ජීවය දෙන්නෙමි, මරණයද දෙන්නෙමි'යි ඔහු කීවේය. 'එසේනම්, අල්ලාහ් සූර්යයාව නැගෙනහිරින් ගෙන එයි, නුඹ එය බටහිරින් ගෙන එනු'යි ඉබ්රාහීම් කීවේය. මෙයින්

*සටහන. 256: 'කුර්සි' (كُرْسِيّ) යන වචනයෙන් මූලිකව අදහස් වන්නේ බලයෙහි ආසනය නැතහොත් සිංහාසනය යන්නයි. මෙම වචනයෙහි මෙම අරුතට පුළුල් යෙදීමක් ඇති අතර 'දැනුම' පමණක් නොව පාලනයෙහි අනෙකුත් අවශ්‍යතාවයන්ටද එය අදාල වේ.

الْمَغْرِبِ فَبُهِتَ الَّذِي كَفَرَ ۗ وَاللَّهُ لَا يَهْدِي الْقَوْمَ الظَّالِمِينَ ﴿٢٥٩﴾

මිථ්‍යාදෘෂ්ටිකයා තුෂ්නිම්භූත විය. තවද අල්ලාහ්, අදමිටු ජනතාවට මග නොපෙන්වයි.

أَوْ كَالَّذِي مَرَّ عَلَىٰ قَرْيَةٍ وَهِيَ خَاوِيَةٌ عَلَىٰ عُرُوشِهَا قَالَ أَنَّىٰ يُحْيِي هَٰذِهِ اللَّهُ بَعْدَ مَوْتِهَا ۖ فَأَمَاتَهُ اللَّهُ مِائَةَ عَامٍ ثُمَّ بَعَثَهُ ۖ قَالَ كَمْ لَبِثْتَ ۖ قَالَ لَبِثْتُ يَوْمًا أَوْ بَعْضَ يَوْمٍ ۖ قَالَ بَل لَّبِثْتَ مِائَةَ عَامٍ فَانظُرْ إِلَىٰ طَعَامِكَ وَشَرَابِكَ لَمْ يَتَسَنَّهْ ۖ وَانظُرْ إِلَىٰ حِمَارِكَ وَلِنَجْعَلَكَ آيَةً لِّلنَّاسِ ۖ وَانظُرْ إِلَى الْعِظَامِ كَيْفَ نُنشِزُهَا ثُمَّ نَكْسُوهَا لَحْمًا ۚ فَلَمَّا تَبَيَّنَ لَهُ قَالَ أَعْلَمُ أَنَّ اللَّهَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٢٦٠﴾

260. නැතහොත්, වහලයන් කඩා වැටුණු නගරයක් පසුකර යමින් සිටින තැනැත්තෙකු පිළිබඳ (ඔබ අසා නැත්ද?) ඔහු 'එහි විනාශයට පසු අල්ලාහ් එය නැවත ජීවයට ගෙනෙන්නේ කවදාදැ'යි පැවසුවේය. පසුව අල්ලාහ් ඔහුව වසර සියයකට මරණයට පත් කළේය. පසුව ඔහුව නැගිටුවමින්, ඔබ කොපමණ කලක් (මෙම තත්ත්වයෙහි) සිටියෙහිදැ'යි ඔහු ඇසුවේය. 'මම දවසක් හෝ දවසකින් කොටසක් සිටියෙමි'යි ඔහු කීවේය. 'නොඑසේය, ඔබ (මෙම තත්ත්වයෙහි) සිය වසරක් සිටියෙහිය. දැන්, ඔබගේ ආහාර දෙසද ඔබගේ පානය දෙසද බලනු. ඒවා නරක්වී නොමැත. තවද ඔබගේ බූරුවා දෙස බලනු. අප ඔබව මිනිසුන්ට සළකුණක් කරනු පිණිස (අපි මෙසේ කළෙමු). තවද අස්ථීන් දෙස බලනු, අපි ඒවා කෙසේ සකස්කොට ඒවා මාංශයෙන් ආවරණය කර ඇත්තෙමුදැ.'යි ඔහු කීවේය. තවද මෙය ඔහුට පැහැදිලිවූ විට 'අල්ලාහ්ට, ඔහු කැමති සියළු දේ කිරීමට බලය ඇති බව මා දනිමි'යි ඔහු කීවේය.

وَإِذْ قَالَ إِبْرَاهِيمُ رَبِّ أَرِنِي كَيْفَ تُحْيِي الْمَوْتَىٰ ۖ قَالَ أَوَلَمْ تُؤْمِن ۖ قَالَ بَلَىٰ وَلَٰكِن لِّيَطْمَئِنَّ قَلْبِي ۖ قَالَ فَخُذْ أَرْبَعَةً مِّنَ الطَّيْرِ فَصُرْهُنَّ إِلَيْكَ ثُمَّ اجْعَلْ عَلَىٰ كُلِّ جَبَلٍ مِّنْهُنَّ جُزْءًا ثُمَّ ادْعُهُنَّ يَأْتِينَكَ

261. තවද ඉබ්රාහිම් 'මාගේ අධිපතියාණෙනි! ඔබ මළවුන්ට ජීවය දෙන්නේ කෙසේදැයි මා හට පෙන්වාදෙනු මැනවැ'යි පැවසූ අවස්ථාව (සිහිපත් කරනු.) ඔහු 'ඔබ විශ්වාස නොකළේදැ?'යි කීවේය. ඔහු 'එසේය, නමුත් මගේ සිත සැනසීම සඳහා (මම මෙය ඇසුවෙමි)'යි කීවේය. ඔහු 'ඔබ පක්ෂීන් සතරක් ගෙන ඔබ හට හීලෑ කරගනු. පසුව උන් එකිනෙකාව එක් එක් කන්දක් මත තබනු. පසුව උන්ව කැඳවනු. උන්

سَعْيًا ۚ وَاعْلَمْ أَنَّ اللّٰهَ عَزِيزٌ حَكِيمٌ ﴿٢٦٠﴾

කඩිනමින් ඔබ වෙත පැමිණෙනු ඇත. තවද අල්ලාහ් බලසම්පන්න ද ප්‍රඥාසම්පන්න ද බව දැනගනු'යි පිළිතුරු දුන්නේය.

مَثَلُ الَّذِينَ يُنفِقُونَ أَمْوَالَهُمْ فِي سَبِيلِ اللّٰهِ كَمَثَلِ حَبَّةٍ أَنبَتَتْ سَبْعَ سَنَابِلَ فِي كُلِّ سُنبُلَةٍ مِّائَةُ حَبَّةٍ ۗ وَاللّٰهُ يُضَاعِفُ لِمَن يَشَاءُ ۗ وَاللّٰهُ وَاسِعٌ عَلِيمٌ ﴿٢٦١﴾

262. කවුරුන් හෝ තමන්ගේ ධනය අල්ලාහ්ගේ මාර්ගයෙහි වැයකරන්නේද, ඔවුන්ගේ උපමාව ධාන්‍ය ඇටයක් බඳුය. එය කරල් සතකින් රෝපණය කරන අතර එක් කරලක බීජ සියයක් ඇත. තවද අල්ලාහ් ඔහු කැමති ඕනෑම කෙනෙකුට (එය) තවදුරටත් වැඩි කර දෙන්නේය. තවද අල්ලාහ් සමෘධිසම්පන්නය, සියල්ල දන්නාය.

الَّذِينَ يُنفِقُونَ أَمْوَالَهُمْ فِي سَبِيلِ اللّٰهِ ثُمَّ لَا يُتْبِعُونَ مَا أَنفَقُوا مَنًّا وَلَا أَذًى ۙ لَّهُمْ أَجْرُهُمْ عِندَ رَبِّهِمْ ۚ وَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُونَ ﴿٢٦٢﴾

263. තමන්ගේ ධනය අල්ලාහ්ගේ මාර්ගයෙහි වැයකර, පසුව තමන් වැය කළ දේ කියාපෑමෙන් හෝ රිදවීමෙන් හෝ අනුගමනය නොකරන අය ගත්කල ඔවුන්ට ඔවුන්ගේ තිළිණ ඔවුන්ගේ අධිපතියාණන් වෙතය. තවද ඔවුනට බියක් නොවනු ඇත, ඔවුන් ශෝක වන්නේද නැත.

قَوْلٌ مَّعْرُوفٌ وَمَغْفِرَةٌ خَيْرٌ مِّن صَدَقَةٍ يَتْبَعُهَا أَذًى ۗ وَاللّٰهُ غَنِيٌّ حَلِيمٌ ﴿٢٦٣﴾

264. රිදවීමක් මගින් ලුහුබඳින්නාවූ දන්දීමට වඩා කාරුණික වදනක් හා ක්ෂමාව දීම, ශ්‍රේෂ්ඨය. තවද අල්ලාහ් ස්වයංපෝෂිතය, ඉතා ඉවසිලි වන්තය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تُبْطِلُوا صَدَقَاتِكُم بِالْمَنِّ وَالْأَذَىٰ ۙ كَالَّذِي يُنفِقُ مَالَهُ رِئَاءَ النَّاسِ وَلَا يُؤْمِنُ بِاللّٰهِ وَالْيَوْمِ الْآخِرِ ۖ فَمَثَلُهُ كَمَثَلِ صَفْوَانٍ عَلَيْهِ تُرَابٌ فَأَصَابَهُ وَابِلٌ فَتَرَكَهُ صَلْدًا ۖ

265. එම්බල විශ්වාසිතයිනි! මිනිසුන්ට පෙනෙන්නට තම ධනය වැයකර තවද අල්ලාහ් සහ අවසාන දිනය කෙරෙහි විශ්වාස නොකරන්නෙකු මෙන් නුඹලාගේ දානයන් කියාපෑමෙන් හා (සිත්) රිදවීමෙන් නිෂ්ඵල කර නොගනු. තවද ඔහුද ඔහුගේ උපමාව පසින් (වැසුණු) ගල් පර්වතයකට සමානය. එය මත තද වැසි ඇදහැලුන විට එය නිරාවරණය වී හිස් බවට පත්වේ. ඔවුන් උපයන දෙයින් අල්පයක්වත් ඔවුනට

لَا يَقْدِرُوْنَ عَلٰى شَیْءٍ مِّمَّا كَسَبُوْا ؕ وَاللّٰهُ لَا يَهْدِی الْقَوْمَ الْكٰفِرِيْنَ ﴿٢٦٥﴾

රැකගත නොහැක. තවද අවිශ්වාසී ජනතාවට අල්ලාහ් මග නොපෙන්වයි.

وَمَثَلُ الَّذِيْنَ يُنْفِقُوْنَ اَمْوَالَهُمُ ابْتِغَآءَ مَرْضَاتِ اللّٰهِ وَتَثْبِيْتًا مِّنْ اَنْفُسِهِمْ كَمَثَلِ جَنَّةٍۭ بِرَبْوَةٍ اَصَابَهَا وَابِلٌ فَاٰتَتْ اُكُلَهَا ضِعْفَيْنِ ۚ فَاِنْ لَّمْ يُصِبْهَا وَابِلٌ فَطَلٌّ ؕ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿٢٦٦﴾

266. තවද අල්ලාහ්ගේ තෘප්තිය ලබාගැනිමටත් තමන්ගේ ආත්මයන් ශක්තිමත් කරගැනිමටත් තමන්ගේ ධනය වැයකරන්නන්ගේ තත්ත්වය, උස් බිමක පිහිටි උද්‍යානයකට සමානය. එය මත තද වැසි පතිත වීමේදී එය තම ඵලදාව දෙගුණ කරදෙයි. තවද එය මත තද වැසි පතිත නොවුයේ නම් එවිට මඳ වැසි (ප්‍රමාණවත්ය.) තවද නුඹලා කරන දේ අල්ලාහ් දකින්නේය.

اَيَوَدُّ اَحَدُكُمْ اَنْ تَكُوْنَ لَهٗ جَنَّةٌ مِّنْ نَّخِيْلٍ وَّاَعْنَابٍ تَجْرِیْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ ۙ لَهٗ فِيْهَا مِنْ كُلِّ الثَّمَرٰتِ ۙ وَاَصَابَهُ الْكِبَرُ وَلَهٗ ذُرِّيَّةٌ ضُعَفَآءُ ۖۚ فَاَصَابَهَآ اِعْصَارٌ فِيْهِ نَارٌ فَاحْتَرَقَتْ ؕ كَذٰلِكَ يُبَيِّنُ اللّٰهُ لَكُمُ الْاٰيٰتِ لَعَلَّكُمْ تَتَفَكَّرُوْنَ ﴿٢٦٧﴾

267. යමෙකුට සියලු වර්ගයේ පලතුරු වලින් පිරි, තවද ඉඳිගස් සහ මිදිවැලින් හෙබි, එයට යටින් ගලා බසිනා ගංගාවන්ගෙන් යුත් උද්‍යානයක් තිබී, මහලු විය ඔහුට අත්වී ඔහුට දුබල දූදරුවන්ද ඇතිව, තවද ගිනියම් සුළි සුළඟක් එයට පහර දී ඒවා (සියල්ල) පිළිස්සී යාමට නුඹලාගෙන් කෙනෙකු කැමැති වන්නේද? මේ අයුරින් නුඹලා මැනවින් සිතා බලනු පිණිස අල්ලාහ් ඔහුගේ සලකුණු නුඹලාට පැහැදිලි කරයි.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اَنْفِقُوْا مِنْ طَيِّبٰتِ مَا كَسَبْتُمْ وَمِمَّاۤ اَخْرَجْنَا لَكُمْ مِّنَ الْاَرْضِ ۖ وَلَا تَيَمَّمُوا الْخَبِيْثَ مِنْهُ تُنْفِقُوْنَ وَلَسْتُمْ بِاٰخِذِيْهِ اِلَّاۤ اَنْ تُغْمِضُوْا فِيْهِ ؕ وَاعْلَمُوْۤا اَنَّ اللّٰهَ غَنِیٌّ حَمِيْدٌ ﴿٢٦٨﴾

268. එම්බල විශ්වාසිතයිනි! නුඹලා උපයාගත් දෙයින්ද, අප නුඹලා සඳහා පොළොවෙන් නිපදවූ දෙයින්ද යහපත් දේ වැයකරනු. තවද පිළිකුලින් බිම බලමින් මිස නුඹලා තමන්ටම එය නොගන්නා කල්හි එයින් අයහපත් දේ (දෙවියන්ගේ මාර්ගයේ) වැය කරන්නට නොපතනු. තවද අල්ලාහ් ස්වයංපෝෂිත බවද, ප්‍රශංසාහිමි බවද දැනගනු.

اَلشَّيۡطٰنُ يَعِدُكُمُ الۡفَقۡرَ وَيَاۡمُرُكُمۡ بِالۡفَحۡشَآءِ‌ۚ وَاللّٰهُ يَعِدُكُمۡ مَّغۡفِرَةً مِّنۡهُ وَفَضۡلًا ‌ؕ وَاللّٰهُ وَاسِعٌ عَلِيۡمٌ ۖۚ ﴿٢٦٩﴾

269. ෂෙයිතාන් නුඹලාට දිළිඳුකම ගැන භය කරමින් පිළිකුල් දෙයට නුඹලාව පොළඹවයි. එහෙත් අල්ලාහ් ඔහු වෙතින් ක්ෂමාව ද, වරප්‍රසාදය ද නුඹලාට පොරොන්දු වන්නේය. තවද අල්ලාහ් සමෘධිසම්පන්නය, සියල්ල දන්නාය.

يُّؤۡتِى الۡحِكۡمَةَ مَنۡ يَّشَآءُ‌‌ۚ وَمَنۡ يُّؤۡتَ الۡحِكۡمَةَ فَقَدۡ اُوۡتِىَ خَيۡرًا كَثِيۡرًا ‌ؕ وَمَا يَذَّكَّرُ اِلَّاۤ اُولُوا الۡاَلۡبَابِ ﴿٢٧٠﴾

270. ඔහු කැමැති අයෙකුට ඔහු ප්‍රඥාව පිරිනමන්නේය. තවද කවරෙකුට හෝ ප්‍රඥාව දෙන ලද්දේද ඇත්තෙන්ම ඔහුට යහපත් දේ ඉතා බහුලව පිරිනමන ලද්දේය. තවද වටහාගැනීම ලැබූවන් මිස අන් කිසිවෙකුත් මෙනෙහි නොකරන්නෝය.

وَمَاۤ اَنۡفَقۡتُمۡ مِّنۡ نَّفَقَةٍ اَوۡ نَذَرۡتُمۡ مِّنۡ نَّذۡرٍ فَاِنَّ اللّٰهَ يَعۡلَمُهٗ ‌ؕ وَمَا لِلظّٰلِمِيۡنَ مِنۡ اَنۡصَارٍ ﴿٢٧١﴾

271. තවද නුඹලා කුමන දෙයක් වැය කළද, නැතහොත් නුඹලා කුමන බාරයක් බාරවුවද නියතවශයෙන්ම අල්ලාහ් එය දන්නේය. තවද වැරදි කරන්නන්ට, උදව් කරන්නන් කිසිවෙක් නොවන්නෝය.

اِنۡ تُبۡدُوا الصَّدَقٰتِ فَنِعِمَّا هِىَ‌ۚ وَاِنۡ تُخۡفُوۡهَا وَتُؤۡتُوۡهَا الۡفُقَرَآءَ فَهُوَ خَيۡرٌ لَّكُمۡ‌ؕ وَيُكَفِّرُ عَنۡكُمۡ مِّنۡ سَيِّاٰتِكُمۡ‌ؕ وَاللّٰهُ بِمَا تَعۡمَلُوۡنَ خَبِيۡرٌ ﴿٢٧٢﴾

272. නුඹලා ප්‍රසිද්ධියේ දන්දෙන්නේ නම් එය යහපත්ය (හොඳය). නමුත් නුඹලා ඒවා සඟවා ඒවා දිළිඳුන්හට දෙන්නේ නම්, එය නුඹලාට වඩා හොඳය. තවද ඔහු නුඹලාගේ (බොහෝ) පාපයන් නුඹලාගෙන් දුරු කරන්නේය. තවද අල්ලාහ් නුඹලා කරන දේ ගැන විමසිලිමත්ය.

لَيۡسَ عَلَيۡكَ هُدٰٮهُمۡ وَلٰـكِنَّ اللّٰهَ يَهۡدِىۡ مَنۡ يَّشَآءُ‌ ؕ وَمَا تُنۡفِقُوۡا مِنۡ خَيۡرٍ فَلِاَنۡفُسِكُمۡ‌ ؕ وَمَا تُنۡفِقُوۡنَ اِلَّا ابۡتِغَآءَ وَجۡهِ اللّٰهِ‌ ؕ وَمَا تُنۡفِقُوۡا مِنۡ خَيۡرٍ يُّوَفَّ اِلَيۡكُمۡ وَاَنۡتُمۡ لَا تُظۡلَمُوۡنَ ﴿٢٧٣﴾

273. ඔවුන්ව යහමග යැවීම ඔබගේ වගකීමක් නොවේ. එහෙත් අල්ලාහ් ඔහු කැමැති කෙනෙකුට මග පෙන්වයි. තවද වස්තුවෙන් කවර හෝ දෙයක් නුඹලා වැය කළද, එය නුඹලාටමය, කෙසේ නමුත් නුඹලා අල්ලාහ්ගේ ප්‍රසාදය පතනු මිස නුඹලා වැය නොකරන්නෙහුය. තවද වස්තුවෙන් කවර හෝ දෙයක් නුඹලා වැය කළද, එය නුඹලාට මුළුමනින්ම ආපසු ගෙවනු ලබන්නේය. තවද, නුඹලාට අසාධාරණයක් නොකරනු ලබන්නේය.

274. (මෙම දන්දීම්) අල්ලාහ්ගේ මාර්ගයෙහි රඳවා තබන ලද එමෙන්ම පොළොවෙහි තැනින් තැන යැමට නොහැකි දුගියන් සඳහා වේ. (ඔවුන් යාචක කමින්) වැළකී සිටින නිසා, ඔවුන් අවශ්‍යතාවයන්ගෙන් මිදුනු අය යැයි අඥානයා සිතන්නේය. ඔවුන්ගේ පෙනුමෙන් ඔබ ඔවුන්ව හඳුනා ගන්නෙහිය. ඔවුහු මිනිසුන්ගෙන් බැගෑපත් වෙමින් නොයදින්නෝය. තවද වස්තුවෙන් කවර හෝ දෙයක් නුඹලා වැය කරන්නේද, නියතවශයෙන්ම අල්ලාහ් ඒ පිළිබඳව පරිපූර්ණ දැනුම ඇත්තාය.

لِلْفُقَرَآءِ الَّذِيْنَ اُحْصِرُوْا فِيْ سَبِيْلِ اللّٰهِ لَا يَسْتَطِيْعُوْنَ ضَرْبًا فِي الْاَرْضِ يَحْسَبُهُمُ الْجَاهِلُ اَغْنِيَآءَ مِنَ التَّعَفُّفِ تَعْرِفُهُمْ بِسِيْمٰهُمْ لَا يَسْـَٔلُوْنَ النَّاسَ اِلْحَافًا وَمَا تُنْفِقُوْا مِنْ خَيْرٍ فَاِنَّ اللّٰهَ بِهٖ عَلِيْمٌ ﴿٢٧٤﴾

275. තමන්ගේ වස්තුව රාත්‍රියෙහි සහ දවාලෙහිද, රහසිගතව සහ ප්‍රසිද්ධියේද, වැය කරන්නන්ට ඔවුන්ගේ තිළිණය ඔවුන්ගේ අධිපතියාණන් සතුව ඇත. ඔවුනට කිසිඳු බියක් (පැමිණෙන්නේ)ද නැත, ඔවුන් ශෝකවන්නේ ද නැත.

اَلَّذِيْنَ يُنْفِقُوْنَ اَمْوَالَهُمْ بِالَّيْلِ وَالنَّهَارِ سِرًّا وَّعَلَانِيَةً فَلَهُمْ اَجْرُهُمْ عِنْدَ رَبِّهِمْ وَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُوْنَ ﴿٢٧٥﴾

276. පොලිය ගිලදමන්නන්, ෂෙයිතාන් විසින් තදින් පහරදීමෙන් උමතුවී නැගිටින තැනැත්තෙකු මෙන් මිස නොනැගිටිති. මන්ද, වෙළඳාම (ද) පොලියට සමානයැයි ඔවුන් පැවසූ නිසාය. නමුත් අල්ලාහ් වෙළඳාම නිත්‍යානුකූල කර ඇති අතර පොලිය අනිත්‍යානුකූල කර ඇත. එබැවින් ඔහුගේ අධිපතියාණන්ගෙන් කිසියම් අවවාදයක් පැමිණීමෙන් පසු ඔහු එයින් වැළකී සිටින්නේ නම්, පෙර (ඔහු ලැබූ දෙය) ඔහුටමය. තවද ඔහුගේ කටයුත්ත අල්ලාහ් වෙතය. තවද කවුරුන් හෝ නැවත (ඒ වෙතට) යන්නේද, ඔවුන්ම ගින්නෙහි සහකරුවන් වෙති. ඔවුන් එහිම වෙසෙනු ඇත.

اَلَّذِيْنَ يَاْكُلُوْنَ الرِّبٰوا لَا يَقُوْمُوْنَ اِلَّا كَمَا يَقُوْمُ الَّذِيْ يَتَخَبَّطُهُ الشَّيْطٰنُ مِنَ الْمَسِّ ذٰلِكَ بِاَنَّهُمْ قَالُوْۤا اِنَّمَا الْبَيْعُ مِثْلُ الرِّبٰوا وَاَحَلَّ اللّٰهُ الْبَيْعَ وَحَرَّمَ الرِّبٰوا فَمَنْ جَآءَهٗ مَوْعِظَةٌ مِّنْ رَّبِّهٖ فَانْتَهٰى فَلَهٗ مَا سَلَفَ وَاَمْرُهٗۤ اِلَى اللّٰهِ وَمَنْ عَادَ فَاُولٰٓئِكَ اَصْحٰبُ النَّارِ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿٢٧٦﴾

يَمْحَقُ اللّٰهُ الرِّبٰوا وَيُرْبِي الصَّدَقٰتِ ۗ وَاللّٰهُ لَا يُحِبُّ كُلَّ كَفَّارٍ اَثِيْمٍ ﴿٢٧٧﴾

*277. අල්ලාහ් පොලිය නැති කර දන්දීම් වර්ධනය කරවන්නේය. තවද කිසිම ස්ථිර අවිශ්වාසිතයෙකු මෙන්ම පරමපාපතරයෙකුව අල්ලාහ් ප්‍රිය නොකරන්නේය.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ وَاَقَامُوا الصَّلٰوةَ وَاٰتَوُا الزَّكٰوةَ لَهُمْ اَجْرُهُمْ عِنْدَ رَبِّهِمْ ۚ وَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُوْنَ ﴿٢٧٨﴾

278. නියතවශයෙන්ම විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරමින්, නමස්කාරයෙහි නිරත වෙමින් zසකාත් (දුගීබද්ද) ගෙවන අය හට ඔවුන්ගේ තිළිණ ඔවුන්ගේ අධිපතියාණන් සතුවය. තවද ඔවුනට කිසිඳු බියක් (පැමිණෙන්නේ)ද නැත, ඔවුන් ශෝකවන්නේද නැත.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اتَّقُوا اللّٰهَ وَذَرُوْا مَا بَقِيَ مِنَ الرِّبٰوا اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ﴿٢٧٩﴾

279. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහි බිය වනු. තවද නුඹලා විශ්වාසිතයින් නම් පොලියෙහි ඉතිරිව ඇති දේ අත් හරිනු.

فَاِنْ لَّمْ تَفْعَلُوْا فَاْذَنُوْا بِحَرْبٍ مِّنَ اللّٰهِ وَرَسُوْلِهٖ ۚ وَاِنْ تُبْتُمْ فَلَكُمْ رُءُوْسُ اَمْوَالِكُمْ ۚ لَا تَظْلِمُوْنَ وَلَا تُظْلَمُوْنَ ﴿٢٨٠﴾

280. එහෙත් නුඹලා (එය) නොකළේ නම්, අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් වෙතින් වූ යුධ ප්‍රකාශයට පරෙස්සම් වනු. තවද නුඹලා පසුතැවිලි වන්නේ නම්, නුඹලාගේ නියම මුදල නුඹලාටය. (මෙලෙස) නුඹලා වැරදි නොකළ යුතු අතර නුඹලාටද වරදක් නොකරනු ලැබේ.

وَاِنْ كَانَ ذُوْ عُسْرَةٍ فَنَظِرَةٌ اِلٰى مَيْسَرَةٍ ۗ وَاَنْ تَصَدَّقُوْا خَيْرٌ لَّكُمْ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿٢٨١﴾

281. තවද කිසිවෙකු (ණයගැතියෙකු) මහත් අපහසු තත්ත්වයක පසුවන්නේ නම්, පහසු කාලය තෙක් (ඔහුට) අවකාශය (දෙනු). තවද නුඹලා දන්නේ නම්, එය දානයක් ලෙස සළකා හැරීම නුඹලාට වඩාත් යහපත්ය.

وَاتَّقُوْا يَوْمًا تُرْجَعُوْنَ فِيْهِ اِلَى اللّٰهِ ۗ ثُمَّ تُوَفّٰى كُلُّ نَفْسٍ مَّا كَسَبَتْ وَهُمْ لَا يُظْلَمُوْنَ ﴿٢٨٢﴾

282. තවද නුඹලා අල්ලාහ් වෙතට ආපසු පමුණුවන ලබන දිනය ගැන බියවනු. එවිට සෑම ආත්මයකටම එය ඉපැයූ දේ මුළුමනින්ම ගෙවනු ලබන්නේය. තවද ඔවුන්හට අසාධාරණයක් කරනු නොලබන්නේය.

*සටහන. 277: පොලියද, අධික පොලියද මත ගොඩනැගුනු ආර්ථිකය විනාශයට පත්වනු බවද, දන්දීම මත ගොඩනැගුනු ආර්ථිකය සමෘද්ධිමත් වනු බවද මෙම වාක්‍යය ඉතා පැහැදිලි තීන්දුවක් දෙයි.

يَاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْٓا اِذَا تَدَايَنْتُمْ بِدَيْنٍ اِلٰٓى
اَجَلٍ مُّسَمًّى فَاكْتُبُوْهُ ؕ وَلْيَكْتُبْ بَّيْنَكُمْ
كَاتِبٌۢ بِالْعَدْلِ ۖ وَلَا يَاْبَ كَاتِبٌ اَنْ
يَّكْتُبَ كَمَا عَلَّمَهُ اللّٰهُ فَلْيَكْتُبْ ۚ
وَلْيُمْلِلِ الَّذِىْ عَلَيْهِ الْحَقُّ وَلْيَتَّقِ اللّٰهَ رَبَّهٗ
وَلَا يَبْخَسْ مِنْهُ شَيْـًٔا ؕ فَاِنْ كَانَ الَّذِىْ
عَلَيْهِ الْحَقُّ سَفِيْهًا اَوْ ضَعِيْفًا اَوْ لَا
يَسْتَطِيْعُ اَنْ يُّمِلَّ هُوَ فَلْيُمْلِلْ وَلِيُّهٗ
بِالْعَدْلِ ؕ وَاسْتَشْهِدُوْا شَهِيْدَيْنِ مِنْ
رِّجَالِكُمْ ۚ فَاِنْ لَّمْ يَكُوْنَا رَجُلَيْنِ
فَرَجُلٌ وَّامْرَاَتٰنِ مِمَّنْ تَرْضَوْنَ مِنَ
الشُّهَدَآءِ اَنْ تَضِلَّ اِحْدٰىهُمَا فَتُذَكِّرَ
اِحْدٰىهُمَا الْاُخْرٰى ؕ وَلَا يَاْبَ الشُّهَدَآءُ
اِذَا مَا دُعُوْا ؕ وَلَا تَسْـَٔمُوْٓا اَنْ تَكْتُبُوْهُ
صَغِيْرًا اَوْ كَبِيْرًا اِلٰٓى اَجَلِهٖ ؕ ذٰلِكُمْ اَقْسَطُ
عِنْدَ اللّٰهِ وَاَقْوَمُ لِلشَّهَادَةِ وَاَدْنٰٓى اَلَّا
تَرْتَابُوْٓا اِلَّآ اَنْ تَكُوْنَ تِجَارَةً حَاضِرَةً
تُدِيْرُوْنَهَا بَيْنَكُمْ فَلَيْسَ عَلَيْكُمْ جُنَاحٌ
اَلَّا تَكْتُبُوْهَا ؕ وَاَشْهِدُوْٓا اِذَا تَبَايَعْتُمْ ۖ

283. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අතරින් කෙනෙකු වෙනත් කෙනෙකුගෙන් නියමිත වාරයක් සඳහා ණයක් ලබාගතහොත්, එය ලියා තබනු. තවද ලියන්නා නුඹලා ඉදිරියෙහි (එය) අවංකව ලිවිය යුතුයි. තවද කිසිදු ලියන්නෙකු ලිවීම ප්‍රත්ක්ෂේප නොකළ යුතුය. මන්ද අල්ලාහ් ඔහුට ඉගැන්වුයේය. එබැවින් ඔහු ලිවිය යුතු අතර වගකීම පැවරී ඇති තැනැත්තා (ලියනු පිණිස) පැවසිය යුතුය. තවද ඔහු ඔහුගේ අධිපතියාණන් වන අල්ලාහ් කෙරෙහි බියවිය යුතු අතර, එහි කිසිම අඩුවක් නොකළ යුතුය. නමුත් වගකීම පැවරී ඇති පුද්ගලයෙකු දැනුමෙන් අඩු නිසා හෝ දුබලයෙකු නිසා හෝ ඔහුට ප්‍රකාශ කිරීමට නොහැකි නම්, ඔහුගේ යහපත වෙනුවෙන් පෙනී සිටින කෙනෙකු යුක්ති සහගතව (ලියනු පිණිස) පැවසිය යුතුය. තවද නුඹලාගේ පිරිමින්ගෙන් සාක්ෂිකරුවන් දෙදෙනෙකු කැඳවනු. තවද පිරිමින් දෙදෙනෙකු (නොමැති කල්හි) නුඹලා කැමැති පරිදි එක් පිරිමියෙකු හා ස්ත්‍රීන් දෙදෙනෙකු සාක්ෂිකරුවන් වශයෙන් ගනු. මන්ද (ස්ත්‍රීන්) දෙදෙනාගෙන් එක් කෙනෙකුට (මතකයෙහි) දෝෂයක් ඇති වූ විට අනෙක් කෙනාට මතක් කරවා දිය හැකිය. තවද සාක්ෂිකරුවන් කැඳවනු ලැබූ විටදී, ඔවුන් ප්‍රතික්ෂේප නොකළ යුතුය. එය කුඩා වුවද විශාල වුවද එය (ගෙවීම සඳහා) නියමිත වේලාව ඇතුලත්ව එය ලියා තැබීමට නුඹලා මැලි නොවනු. මෙය අල්ලාහ් අභියස වඩාත් යුක්ති සහගත වන අතර සාක්ෂිය ස්ථිර කර නුඹලාව සැකයෙන් ඈත් කර තැබීමට ඉවහල් වනු ඇත. එබැවින් නුඹලා අතර අතින් අතට හුවමාරු කරගන්නා වෙළඳ භාණ්ඩයක ගණුදෙනුවක් මිස (ලියා තැබීම පැහැර නොහරිනු), එවැනි අවස්ථාවක නම් නුඹලා ලියා නොතැබීම නුඹලාට පවක්

නොවන්නේය. තවද නුඹලා එකිනෙකා අතර ගනුදෙනු කරන විට සාක්ෂිකරුවන් යොදා ගනු. තවද ලියන්නාටද, සාක්ෂිකරුවාටද හිංසාවක් නොවීමට වග බලාගත යුතුය. තවද නුඹලා (එසේ) කළේ නම් ඇත්තෙන්ම එය නුඹලාගේ අකීකරුභාවය වේ. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද අල්ලාහ් නුඹලාට දැනුම ලබා දෙන්නේය. තවද අල්ලාහ් සියල්ල මැනැවින් දන්නේය.

وَلَا يُضَآرَّ كَاتِبٌ وَّلَا شَهِيْدٌ ۬ وَاِنْ تَفْعَلُوْا
فَاِنَّهٗ فُسُوْقٌ بِكُمْ ؕ وَاتَّقُوا اللّٰهَ ؕ
وَيُعَلِّمُكُمُ اللّٰهُ ؕ وَاللّٰهُ بِكُلِّ شَیْءٍ عَلِيْمٌ ﴿٢٨٣﴾

284. තවද නුඹලා ගමනෙහි යෙදී සිටින විටකදී, නුඹලාට ලියන්නෙකු නොලැබුනේ නම් එවිට ඇපයක් ලෙස දෙයක් ලබාගත යුතුය. තවද නුඹලාගෙන් කෙනෙකු තවත් කෙනෙකු වෙත යම් දෙයක් විශ්වාසයෙන් යුතුව භාරකළේ නම්, විශ්වාසයෙන් භාරගත් තැනැත්තා භාරගත් දේ ආපසු භාරදිය යුතු අතර තම අධිපතියාණන් වන අල්ලාහ්ට බිය විය යුතුය. තවද සාක්ෂිය නොසඟවනු. යමෙක් එය සඟවන්නේද ඔහුගේ හදවත නිසැකවම පාපකාරී වේ. තවද නුඹලා කරන දේ අල්ලාහ් මැනැවින් දන්නේය.

وَاِنْ كُنْتُمْ عَلٰى سَفَرٍ وَّلَمْ تَجِدُوْا كَاتِبًا
فَرِهٰنٌ مَّقْبُوْضَةٌ ؕ فَاِنْ اَمِنَ بَعْضُكُمْ
بَعْضًا فَلْيُؤَدِّ الَّذِى اؤْتُمِنَ اَمَانَتَهٗ وَلْيَتَّقِ
اللّٰهَ رَبَّهٗ ؕ وَلَا تَكْتُمُوا الشَّهَادَةَ ؕ وَمَنْ
يَّكْتُمْهَا فَاِنَّهٗۤ اٰثِمٌ قَلْبُهٗ ؕ وَاللّٰهُ بِمَا
تَعْمَلُوْنَ عَلِيْمٌ ﴿٢٨٤﴾ ع

285. අහස්හි ඇති සියළු දේ ද, පොළොවෙහි ඇති සියළු දේ ද අල්ලාහ්ටම අයත්ය. නුඹලාගේ සිත්තුළ ඇති දේ නුඹලා එළිදරව් කළද නැතහොත් එය සඟවා තැබුවද අල්ලාහ් එය පිළිබඳව නුඹලාගෙන් විමසනු ඇත. පසුව ඔහු කැමැති කෙනෙකුට ක්ෂමාව දෙන්නේය. තවද ඔහු කැමැති කෙනෙකුට දඬුවම් දෙන්නේය. අල්ලාහ්ට ඔහු අභිමත සියල්ල කිරීමට බලය ඇත.

لِلّٰهِ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الْاَرْضِ ؕ وَاِنْ
تُبْدُوْا مَا فِىْۤ اَنْفُسِكُمْ اَوْ تُخْفُوْهُ
يُحَاسِبْكُمْ بِهِ اللّٰهُ ؕ فَيَغْفِرُ لِمَنْ يَّشَآءُ
وَيُعَذِّبُ مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَیْءٍ
قَدِيْرٌ ﴿٢٨٥﴾

286. (අපගේ) මෙම දූතයාණන් ඔහුගේ අධිපතියාණන්ගෙන් ඔහු වෙත පහළ කළ දේ කෙරෙහි විශ්වාස කරන අතර විශ්වාසිතයින්ද

اٰمَنَ الرَّسُوْلُ بِمَاۤ اُنْزِلَ اِلَيْهِ مِنْ رَّبِّهٖ
وَالْمُؤْمِنُوْنَ ؕ كُلٌّ اٰمَنَ بِاللّٰهِ وَمَلٰٓئِكَتِهٖ

وَكُتُبِهٖ وَرُسُلِهٖ ۚ لَا نُفَرِّقُ بَيْنَ اَحَدٍ مِّنْ رُّسُلِهٖ ۚ وَ قَالُوْا سَمِعْنَا وَاَطَعْنَا ۗ غُفْرَانَكَ رَبَّنَا وَ اِلَيْكَ الْمَصِيْرُ ﴿٢٨٦﴾

(එලෙසම කරති). (ඔවුන්) සියල්ලන්ම අල්ලාහ් කෙරෙහිද ඔහුගේ සුරදූතයන් කෙරෙහිද ඔහුගේ ග්‍රන්ථයන් කෙරෙහිද ඔහුගේ දූතයින් කෙරෙහිද විශ්වාස කරමින්, 'අපි ඔහුගේ දූතයින් අතරින් කිසිවෙකුටත් වෙනස්කමක් නොදක්වමු'(යි පවසන්නෝය). තවද ඔවුහු 'අපි සවන් දුනිමු, තවද අපි කීකරු වූයෙමු. අපගේ අධිපතියාණෙනි, ඔබගේ සමාව (අපි අයැදින්නෙමු), තවද ආපසු පැමිණීම ඔබ වෙතටම වේ'යැයි පවසති.

لَا يُكَلِّفُ اللّٰهُ نَفْسًا اِلَّا وُسْعَهَا ؕ لَهَا مَا كَسَبَتْ وَعَلَيْهَا مَا اكْتَسَبَتْ ؕ رَبَّنَا لَا تُؤَاخِذْنَآ اِنْ نَّسِيْنَآ اَوْ اَخْطَاْنَا ۚ رَبَّنَا وَلَا تَحْمِلْ عَلَيْنَآ اِصْرًا كَمَا حَمَلْتَهٗ عَلَى الَّذِيْنَ مِنْ قَبْلِنَا ۚ رَبَّنَا وَلَا تُحَمِّلْنَا مَا لَا طَاقَةَ لَنَا بِهٖ ۚ وَاعْفُ عَنَّا ۗ وَاغْفِرْ لَنَا ۗ وَارْحَمْنَا ۗ اَنْتَ مَوْلٰىنَا فَانْصُرْنَا عَلَى الْقَوْمِ الْكٰفِرِيْنَ ﴿٢٨٧﴾

*287. අල්ලාහ් කිසිම ආත්මයකට, එහි ශක්තියට වඩා බර නොපටවන්නේය. ඔහු උපයාගන්නා (තිළිණයද) ඔහුටමය, තවද ඔහු උපයාගන්නා (දඬුවමද) ඔහුටමය. අපගේ අධිපතියාණෙනි! අපට අමතක වන විට හෝ අප වරදකට හසුවුණු විට අපට දඬුවම් නොකරනු මැනව. තවද අපගේ අධිපතියාණෙනි, අපට පෙර සිටි අය හට ඔබ පැට වූ පරිදි අප හටද ඔබ බර නොපටවනු මැනව. අපගේ අධිපතියාණෙනි! අපගේ ශක්තියට දරාගත නොහැකි දෙයක් අප මත නොපටවනු මැනව. තවද අපගේ (පව්) මකා දමනු මැනව. තවද අපට සමාව දෙනු මැනව, තවද අප වෙත කරුණාව දක්වනු මැනව. ඔබ අපගේ ස්වාමියාය. එබැවින් අවිශ්වාසිත ජනතාවට එරෙහිව ඔබ අප හට උදව් කරනු මැනව.

*සටහන. 287: ආගමික වගකීම් භාරකරන ලද පෙර ජනතාව පිළිබඳව මෙහි සඳහන් වේ. එහෙත් ඔවුන් එයට අගෞරවයෙන් යුතුව සැළකූ අතර ඒවා බරක් ලෙසද සැළකූහ. සමාජයෙහි පහළ මට්ටමේ වූ වෘත්තිමය පූජකවරුන්ට එම බර ඔවුන්ගේ උරහිස් මත පටවන ලද අතර ඒ තුලින් ආගමික පූජකත්වයේ උපත සිදුවුණි. මෙයින් එයට (ආගමික වගකීමට) මුළුමනින්ම සාධාරණත්වයක් ඉටුකළ නොහැකි වූ ආගමික දැනුමෙහි ඒකාධිකාරය ඇති විය. මෙම ක්‍රියා පටිපාටිය අවසානය පටු අදහසින් යුත්, උඩඟු වූ, අගතිගාමී ගති ඇති ආගමික පූජකවරුන් බිහිවීමට තුඩු දුන් අතර ඔවුන්ගෙන් සුළු දෙනෙක් පමණක් දේව වදන්වල මහාත්මභාවය සහ දර්ශනය තේරුම් ගත්හ. එසේ තේරුම් නොගත් ආගමික නායකත්වය 62:6 (අල්-ජුමුආ) හි බූරුවන්ට සම කර ඇත. බූරුවන්ගේ පිටෙහි ආගමික ග්‍රන්ථ පටවා ඇති අතර ඔවුන් ඔසුලන සුළු බර පමණක් තේරුම් ගනිති. එබැවින් 'ඉස්රන්' (اِصْرًا) යන වචනය මෙවැනි පසුබිමකින් තේරුම් ගත යුතුව ඇත. මන්ද දෙවියන් විසින් පවරන ලද කිසිඳු වගකීමක්, සත්‍ය විශ්වාසිතයින් පලායාමට තැත්කරන්නාවූ බරක් ලෙස සැළකිය නොහැක.



## ආලි ඉම්රාන්

(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓ ۝٢

2. අලිෆ් ලාම් මීම්◆

اللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ ۙ الۡحَـىُّ الۡقَيُّوۡمُ ۝٣

3. ඔහු අල්ලාහ්, ඔහු හැර නැමැදීමට සුදුස්සෙක් නොමැත, ජීවමානය. ස්වයං ස්ථායිය, සියල්ල පැවතීමට සලස්වන්නාය.

نَزَّلَ عَلَيۡكَ الۡكِتٰبَ بِالۡحَـقِّ مُصَدِّقًا لِّمَا بَيۡنَ يَدَيۡهِ وَاَنۡزَلَ التَّوۡرٰٮةَ وَالۡاِنۡجِيۡلَ ۝٤

*4. සත්‍යය අඩංගු (තවද) එයට පෙර වූ දේ පරිපූර්ණ කරන්නාවූද ග්‍රන්ථය ඔහු ඔබ වෙත පහළ කළේය. තවද ඔහු තව්රාතයද ඉන්ජීලයද පහළ කළේය.

مِنۡ قَبۡلُ هُدًى لِّلنَّاسِ وَاَنۡزَلَ الۡفُرۡقَانَ ؕ اِنَّ الَّذِيۡنَ كَفَرُوۡا بِاٰيٰتِ اللّٰهِ لَهُمۡ عَذَابٌ شَدِيۡدٌ ؕ وَاللّٰهُ عَزِيۡزٌ ذُو انۡتِقَامٍ ۝٥

*5. (එය) මෙයට පෙරවූ ජනතාවට මගපෙන්වීමක් ලෙසය. තවද ඔහු ෆුර්කාන් (වෙන්කර හඳුනාගැනීම)ද පහළ කළේය. නියතවශයෙන්ම අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නන්ට දැඩි දඬුවමක් ලැබෙනු ඇත. තවද අල්ලාහ් බලසම්පන්නය, දඬුවම් දීමට බලය ඇත්තාය.

اِنَّ اللّٰهَ لَا يَخۡفٰى عَلَيۡهِ شَىۡءٌ فِى الۡاَرۡضِ وَلَا فِى السَّمَآءِ ؕ ۝٦

6. නියතවශයෙන්ම පොළොවෙහිද, අහස්හිද අල්ලාහ්ගෙන් සැඟවෙන කිසිදෙයක් නොමැත.

هُوَ الَّذِىۡ يُصَوِّرُكُمۡ فِى الۡاَرۡحَامِ كَيۡفَ يَشَآءُ ؕ لَاۤ اِلٰهَ اِلَّا هُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ ۝٧

7. ගර්භාෂයන් තුළ තමා කැමති පරිදි නුඹලාව හැඩගස්වන්නේ ඔහුමය. ඔහු හැර නැමැදීමට සුදුස්සෙක් නොමැත. ඔහු බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය.

---

◆ මම අල්ලාහ්, සියල්ල දන්නාය.

* සටහන. 4 සහ 5: මෙහි 'මුසද්දිකන්' ( مُصَدِّقًا ) යන වචනයට මුල් පරිවර්ථනයෙහි දී ඇති 'පරිපූර්ණ කරන්නාවූ' යන ප්‍රකාශයට වඩා මෙහි පුළුල් යෙදුමක් ඇත. එනම්, පෙර පහළ වූ දේව අනාවරණයන් හි සත්‍යය ස්ථිර කරන අතර ඒවායෙහි අඩංගු පෙරනිමිති පරිපූර්ණ කරන්නාවූද ඒවා සැබෑ කරන්නාවූද යන අරුතද ගෙන දේ. මෙවැනි පසුතලයකදී අධ්‍යයනය කර ඇති වාක්‍යය ඉහත සඳහන් පරිදි පරිවර්තනය කිරීම වඩා උචිත විය හැකිය. 'අල් ෆුර්කාන්'( الْفُرْقَانَ ) යනු තර්ක කළ නොහැකි සත්‍යය එමෙන්ම යම් දෙයක් තවත් දෙයකින් ඉතා පැහැදිලිව වෙන්කර දැක්වීමය. එම නිසා මෙය නිර්ණායකයක් ලෙස ක්‍රියා කරයි.

هُوَ الَّذِيٓ اَنۡزَلَ عَلَيۡكَ الۡكِتٰبَ مِنۡهُ اٰيٰتٌ
مُّحۡكَمٰتٌ هُنَّ اُمُّ الۡكِتٰبِ وَاُخَرُ
مُتَشٰبِهٰتٌ ؕ فَاَمَّا الَّذِيۡنَ فِىۡ قُلُوۡبِهِمۡ زَيۡغٌ
فَيَتَّبِعُوۡنَ مَا تَشَابَهَ مِنۡهُ ابۡتِغَآءَ الۡفِتۡنَةِ
وَابۡتِغَآءَ تَاۡوِيۡلِهٖ ۚ وَمَا يَعۡلَمُ تَاۡوِيۡلَهٗۤ اِلَّا
اللّٰهُ ؔ وَالرّٰسِخُوۡنَ فِى الۡعِلۡمِ يَقُوۡلُوۡنَ
اٰمَنَّا بِهٖ ۙ كُلٌّ مِّنۡ عِنۡدِ رَبِّنَا ۚ وَمَا يَذَّكَّرُ اِلَّاۤ
اُولُوا الۡاَلۡبَابِ ۝٨

8. ඔබ වෙත ග්‍රන්ථය පහළ කළේ ඔහුමය. අර්ථයෙහි ඒකාන්ත වූ වාක්‍යයන් මෙහි ඇත. ග්‍රන්ථයෙහි මූලය මේවාය. තවද සෙස්ස වෙනස් වූ අර්ථකථනයන් දීමට ඉඩ ඇති ඒවාය. නමුත් කවුරුන්ගේ හෝ සිත් තුළ අදම්‍යකම ඇත්තේද එවන් අය, වෙනස් වූ අර්ථකථනයන් දීමට ඉඩ ඇති ඒවා පසුපස යමින්, අසමගිය ඇතිකිරීමට මග සොයමින්ද, ඒවායෙහි (වැරදි) අර්ථකථනයන් සොයමින්ද යන්නෝය. නමුත් ඒවායෙහි (නිවැරදි) අර්ථකථනය අල්ලාහ් සහ ඥානයෙහි දැඩිව ස්ථිරසාර වූවන් හැර අන් කිසිවෙකු නොදනිති. ඔවුහු 'අපි මෙය කෙරෙහි විශ්වාස කරන්නෙමු. මේ සියල්ල අපගේ අධිපතියාණන් වෙතින්ය'යි පවසති. තවද වටහාගැනීම පිරිනමනු ලැබූවන් මිස අන් කිසිවෙකු වටහා නොගනිති.

رَبَّنَا لَا تُزِغۡ قُلُوۡبَنَا بَعۡدَ اِذۡ هَدَيۡتَنَا وَهَبۡ
لَنَا مِنۡ لَّدُنۡكَ رَحۡمَةً ۚ اِنَّكَ اَنۡتَ
الۡوَهَّابُ ۝٩

9. 'අපගේ අධිපතියාණෙනි, ඔබ අප හට මග පෙන්වීමෙන් පසු අපගේ හදවත් නොමග යෑමට ඉඩ නොහරිනු මැනව. තවද අප හට ඔබ වෙතින් දයාව දක්වනු මැනව. නියතවශයෙන්ම අධික ලෙස පිරිනමන්නා ඔබ පමණි'.

رَبَّنَاۤ اِنَّكَ جَامِعُ النَّاسِ لِيَوۡمٍ لَّا رَيۡبَ
فِيۡهِ ؕ اِنَّ اللّٰهَ لَا يُخۡلِفُ الۡمِيۡعَادَ ۝١٠

10. 'අපගේ අධිපතියාණෙනි, කිසිදු සැකයක් නැති එම දිනයෙහි දී ඔබ මිනිස්වර්ගයා එක්රැස් කරනු නියතය. නියතවශයෙන්ම අල්ලාහ් (තම) පොරොන්දුව කඩ නොකරයි.'

اِنَّ الَّذِيۡنَ كَفَرُوۡا لَنۡ تُغۡنِىَ عَنۡهُمۡ
اَمۡوَالُهُمۡ وَلَاۤ اَوۡلَادُهُمۡ مِّنَ اللّٰهِ شَيۡـــًٔا ؕ
وَاُولٰٓـئِكَ هُمۡ وَقُوۡدُ النَّارِ ۝١١

11. අවිශ්වාස කරන්නන්ට ඔවුන් සතු සම්පත්ද ඔවුන්ගේ දරුවන්ද අල්ලාහ්ට එරෙහිව ඔවුනට කිසිදු උපකාරයක් නොවනු ඇත. ගින්නෙහි ඉන්ධන වන්නේ ද ඔවුන්මය.

كَدَاۡبِ اٰلِ فِرۡعَوۡنَ ۙ وَالَّذِيۡنَ مِنۡ
قَبۡلِهِمۡ ؕ كَذَّبُوۡا بِاٰيٰتِنَا ۚ فَاَخَذَهُمُ اللّٰهُ

12. (ඔවුන්ගේ තත්ත්වය නම්) ෆිර්අවුන්ගේ ජනතාවගේද, ඔවුනට පෙර සිටියවුන්ගේද තත්ත්වයට සමානය. ඔවුහු අපගේ සළකුණු

بِذُنُوْبِهِمْ ۗ وَاللّٰهُ شَدِيْدُ الْعِقَابِ ﴿١٢﴾

ප්‍රතික්ෂේප කළහ. එබැවින් අල්ලාහ් ඔවුන්ගේ පාපයන් හේතුකොට ගෙන ඔවුනට දඬුවම් කළේය. තවද අල්ලාහ් දඬුවම් දීමෙදී ඉතා දැඩිය.

قُلْ لِّلَّذِيْنَ كَفَرُوْا سَتُغْلَبُوْنَ وَتُحْشَرُوْنَ اِلٰى جَهَنَّمَ ۗ وَبِئْسَ الْمِهَادُ ﴿١٣﴾

13. අවිශ්වාස කරන්නන්ට පවසන්න. 'නුඹලා පරාජය කරනු ලබන්නෙහුමය. තවද නිරයෙහි එක්රැස් කරනු ලබන්නෙහුය. තවද එය ගිමන් හරින්නට නපුරු තැනකි.'

قَدْ كَانَ لَكُمْ اٰيَةٌ فِيْ فِئَتَيْنِ الْتَقَتَا ۗ فِئَةٌ تُقَاتِلُ فِيْ سَبِيْلِ اللّٰهِ وَاُخْرٰى كَافِرَةٌ يَّرَوْنَهُمْ مِّثْلَيْهِمْ رَاْيَ الْعَيْنِ ۗ وَاللّٰهُ يُؤَيِّدُ بِنَصْرِهٖ مَنْ يَّشَآءُ ۗ اِنَّ فِيْ ذٰلِكَ لَعِبْرَةً لِّاُولِى الْاَبْصَارِ ﴿١٤﴾

14. එකිනෙකා අතර සටන් වැදුන සේනාංකයන් දෙකෙහි නියතවශයෙන්ම නුඹලාට සළකුණක් ඇත. එක් සේනාවක් අල්ලාහ්ගේ මාර්ගයේ සටන් කළ අතර අනෙක අවිශ්වාස කරන්නන්ය. ඇත්තෙන්ම ඔවුහු, මොවුන්ව (ඔවුන්ගේ) ඇස්වලින්ම ඔවුන්ට වඩා දෙගුණයක් සේ දුටුහ. (මෙලෙස) අල්ලාහ් ඔහු කැමැති ඕනෑම කෙනෙකුව ඔහුගේ උපකාරයෙන් ශක්තිමත් කරන්නේය. දෑස් ඇත්තවුන් හට නිසැකවම එහිලා පාඩමක් ඇත.

زُيِّنَ لِلنَّاسِ حُبُّ الشَّهَوٰتِ مِنَ النِّسَآءِ وَالْبَنِيْنَ وَالْقَنَاطِيْرِ الْمُقَنْطَرَةِ مِنَ الذَّهَبِ وَالْفِضَّةِ وَالْخَيْلِ الْمُسَوَّمَةِ وَالْاَنْعَامِ وَالْحَرْثِ ۗ ذٰلِكَ مَتَاعُ الْحَيٰوةِ الدُّنْيَا ۚ وَاللّٰهُ عِنْدَهٗ حُسْنُ الْمَاٰبِ ﴿١٥﴾

15. ප්‍රිය කරන දේවල් වන ස්ත්‍රීන් සහ දරුවන්ද ගබඩා කර ඇති රන් රිදීද අලංකාර වූ අශ්වයින්ද ගවයින්ද වගාවන්ද (යනාදියෙහි) ඇල්ම මිනිසුන්ට අලංකාර කොට ඇත. ඒවා මෙලොව ජීවිතයේ ජීවනෝපායන්ය. නමුත් විශිෂ්ඨ වූ නවාතැනක් ඇත්තේ අල්ලාහ් වෙතය.

قُلْ اَؤُنَبِّئُكُمْ بِخَيْرٍ مِّنْ ذٰلِكُمْ ۗ لِلَّذِيْنَ اتَّقَوْا عِنْدَ رَبِّهِمْ جَنّٰتٌ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَا وَاَزْوَاجٌ مُّطَهَّرَةٌ وَّرِضْوَانٌ مِّنَ اللّٰهِ ۗ وَاللّٰهُ بَصِيْرٌ

16. පවසන්න, 'නුඹලාට එයටත් වඩා හොඳ දෙයක් ගැන දැනුම් දෙන්නද?' දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන්ට ඔවුන්ගේ අධිපතියාණන් සතුව උද්‍යානයන් ඇත. ඒවා යටින් ගංගාවන් ගලා බසිති. ඔවුහු එහිම වෙසෙති. තවද එහි (අල්ලාහ් විසින්) පවිත්‍රවත් කරන ලද සහකරුවන්ද, අල්ලාහ්ගෙන් වූ සොම්නස ද ඇත. තවද අල්ලාහ් (ඔහුගේ) දාසයින්

بِالْعِبَادِ ١٦

කෙරෙහි විමසිලිමත්ය.

الَّذِينَ يَقُولُونَ رَبَّنَا إِنَّنَا آمَنَّا فَاغْفِرْ لَنَا ذُنُوبَنَا وَقِنَا عَذَابَ النَّارِ ١٧

17. මෙවැන්නන් 'අපගේ අධිපතියාණෙනි, අපි විශ්වාස කරන්නෙමු. එබැවින් අපගේ පව් ක්ෂමා කරනු මැනව. තවද ගින්නෙහි දඬුවමෙන් අපව ආරක්ෂා කරනු මැනවැ'යි පවසති.

الصَّابِرِينَ وَالصَّادِقِينَ وَالْقَانِتِينَ وَالْمُنْفِقِينَ وَالْمُسْتَغْفِرِينَ بِالْأَسْحَارِ ١٨

18. (ඔවුහු) ස්ථිරසාර ද, සත්‍යවාදී ද, නිහතමානී ද, තවද දෙවියන්ගේ මාර්ගයෙහි වැය කරන්නන් ද, රාත්‍රියෙහි අග භාගයෙහිදී සමාව අයැද සිටින්නන් ද වේ.

شَهِدَ اللَّهُ أَنَّهُ لَا إِلَٰهَ إِلَّا هُوَ وَالْمَلَائِكَةُ وَأُولُو الْعِلْمِ قَائِمًا بِالْقِسْطِ ۚ لَا إِلَٰهَ إِلَّا هُوَ الْعَزِيزُ الْحَكِيمُ ١٩

*19. අල්ලාහ් ඔහු හැර නැමදීමට සුදුසු අන් කිසිවෙකු නොමැති බවට සාක්ෂි දරයි. එමෙන්ම සුරදූතයින් ද, දැනුමැත්තන් ද (එසේ කරයි). යුක්තිය පවත්වන්නාය. ඔහු හැර නැමදීමට සුදුසු අන් කිසිවෙකු නොමැත, බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

إِنَّ الدِّينَ عِنْدَ اللَّهِ الْإِسْلَامُ ۗ وَمَا اخْتَلَفَ الَّذِينَ أُوتُوا الْكِتَابَ إِلَّا مِنْ بَعْدِ مَا جَاءَهُمُ الْعِلْمُ بَغْيًا بَيْنَهُمْ ۗ وَمَنْ يَكْفُرْ بِآيَاتِ اللَّهِ فَإِنَّ اللَّهَ سَرِيعُ الْحِسَابِ ٢٠

20. නියතවශයෙන්ම අල්ලාහ් සතු (සත්‍ය) ආගම වනුයේ ඉස්ලාම් (පරිපූර්ණ අවනතභාවය) වේ. තවද පුස්තකය දෙන ලද අය, ඔවුන් වෙත දැනුම පැමිණි පසුව, ඔවුනතර වූ පරස්පර විරෝධය හේතුවෙන් මිස විරුද්ධ නොවූහ. තවද කවුරුන් හෝ අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නේ ද එසේ නම් නියතවශයෙන්ම, ගණන් ගැනීමෙහි අල්ලාහ් ඉතා සීඝ්‍රය.

فَإِنْ حَاجُّوكَ فَقُلْ أَسْلَمْتُ وَجْهِيَ لِلَّهِ وَمَنِ اتَّبَعَنِ ۗ وَقُلْ لِلَّذِينَ أُوتُوا الْكِتَابَ وَالْأُمِّيِّينَ أَأَسْلَمْتُمْ ۚ فَإِنْ أَسْلَمُوا فَقَدِ اهْتَدَوْا ۖ وَإِنْ تَوَلَّوْا فَإِنَّمَا عَلَيْكَ الْبَلَاغُ ۗ

21. නමුත් ඔවුන් ඔබ හා තර්ක කරන්නේ නම්, 'මම අල්ලාහ්ට අවනත වූයෙමි, එමෙන්ම මාව අනුගමනය කරන්නන්ද යැ'යි පවසන්න. තවද පුස්තකය දෙන ලද අයගෙන්ද, නූගතුන්ගෙන්ද, 'නුඹලා අවනත වූයේදැ'යි අසන්න. ඔවුහු අවනත වූයේ නම්, ඔවුහු නිශ්චිතවම මග පෙන්වනු ලබන්නෝය. නමුත්

*සටහන. 19: ඇත්තෙන්ම 'කායිමන් බිල් කිස්ති' ( قَآئِمًا بِالْقِسْطِ )යන අරාබි පදයෙහි අරුත 'යුක්තිය පවත්වන්නාය' යන පරිවර්තනයට වඩා බලගතුය. එබැවින් 'නිරතුරුවම යුක්තිය රකින්නා' යන්න වඩාත් හොඳ පරිවර්තනයක් විය හැක.

وَاللّٰهُ بَصِيْرٌۢ بِالْعِبَادِ ﴿٢١﴾

ඔවුහු ඉවත හැරුණේ නම්, ඔබගේ වගකීම වනුයේ පණිවිඩය දීම පමණකි. තවද අල්ලාහ් (ඔහුගේ) දාසයින් ගැන විමසිලිමත්ය.

اِنَّ الَّذِيْنَ يَكْفُرُوْنَ بِاٰيٰتِ اللّٰهِ وَيَقْتُلُوْنَ النَّبِيّٖنَ بِغَيْرِ حَقٍّ ۙ وَّيَقْتُلُوْنَ الَّذِيْنَ يَاْمُرُوْنَ بِالْقِسْطِ مِنَ النَّاسِ ۙ فَبَشِّرْهُمْ بِعَذَابٍ اَلِيْمٍ ﴿٢٢﴾

22. නියතවශයෙන්ම අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරමින්, අයුක්තිසහගතව වක්තෘවරුන් ඝාතනය කිරීමට තැත්කරමින් ජනතාව අතුරින් යුක්තිය ක්‍රියාත්මක කිරීම පිණිස අණ කරන්නන්ව ද ඝාතනය කිරීමට තැත් කරමින් සිටිනවුනට වේදනීය දඬුවමක් පිළිබඳව ඔවුනට දන්වන්න.

اُولٰٓئِكَ الَّذِيْنَ حَبِطَتْ اَعْمَالُهُمْ فِى الدُّنْيَا وَالْاٰخِرَةِ ۡ وَمَا لَهُمْ مِّنْ نّٰصِرِيْنَ ﴿٢٣﴾

23. මෙලොවෙහිදීත් පරලොවෙහිදීත් තමන්ගේ ක්‍රියාවන් ශූන්‍ය වන්නාවූ අය ඔවුන්මය. තවද ඔවුනට උදව් කරන්නන් කිසිවෙකු නොවනු ඇත.

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ اُوْتُوْا نَصِيْبًا مِّنَ الْكِتٰبِ يُدْعَوْنَ اِلٰى كِتٰبِ اللّٰهِ لِيَحْكُمَ بَيْنَهُمْ ثُمَّ يَتَوَلّٰى فَرِيْقٌ مِّنْهُمْ وَهُمْ مُّعْرِضُوْنَ ﴿٢٤﴾

24. පුස්තකයෙහි (ඔවුන්ගේ) කොටස දෙනු ලැබුවන් පිළිබඳව ඔබ නොදන්නෙහිද? ඔවුනතර විනිශ්චය කරනු පිණිස, අල්ලාහ්ගේ පුස්තකය වෙතට ඔවුන්ව කැඳවනු ලැබූ විටදී, ඔවුන්ගෙන් පිරිසක් පිළිකුලෙන් ඉවත හැරෙන්නෝය.

ذٰلِكَ بِاَنَّهُمْ قَالُوْا لَنْ تَمَسَّنَا النَّارُ اِلَّآ اَيَّامًا مَّعْدُوْدٰتٍ ۠ وَغَرَّهُمْ فِىْ دِيْنِهِمْ مَّا كَانُوْا يَفْتَرُوْنَ ﴿٢٥﴾

25. එයට හේතුව 'සීමිත දින ගණනකට මිස ගින්න අපව ස්පර්ශ නොකරනු ඇත'යි ඔවුන් පවසන නිසාය. තවද ඔවුන්ගේ ධර්මය සම්බන්ධයෙන් ඔවුන් ගොතමින් සිටි දේ ඔවුන්ව මුලාවට පත්කළේය.

فَكَيْفَ اِذَا جَمَعْنٰهُمْ لِيَوْمٍ لَّا رَيْبَ فِيْهِ ۣ وَوُفِّيَتْ كُلُّ نَفْسٍ مَّا كَسَبَتْ وَهُمْ لَا يُظْلَمُوْنَ ﴿٢٦﴾

26. කිසිඳු සැකයක් නැති එම දිනයෙහිදී, අප ඔවුන්ව එක්රැස් කරන කල්හි, තවද සෑම ආත්මයකට එය උපයාගත් දේ මුළුමනින්ම ගෙවනු ලබන විට, තවද ඔවුනට වරදක් කරනු නොලබන විට (ඔවුන්ගේ තත්ත්වය) කුමක් වේද?

قُلِ اللّٰهُمَّ مٰلِكَ الْمُلْكِ تُؤْتِي الْمُلْكَ مَنْ تَشَآءُ وَتَنْزِعُ الْمُلْكَ مِمَّنْ تَشَآءُ ۫ وَتُعِزُّ مَنْ تَشَآءُ وَتُذِلُّ مَنْ تَشَآءُ ؕ بِيَدِكَ الْخَيْرُ ؕ اِنَّكَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿٢٧﴾

27. පවසන්න, 'ඕ අල්ලාහ්! සියළු රාජ්‍යයෙහි අධිපතියාණෙනි, ඔබ කැමැති ඕනෑම කෙනෙකුට ඔබ රාජ්‍ය පුදන්නෙහිය. ඔබ කැමැති ඕනෑම කෙනෙකුගෙන් රාජ්‍ය උදුරා ගන්නෙහිය. ඔබ කැමැති ඕනෑම කෙනෙකුව ඔබ උසස් තත්ත්වයට පත්කරන්නෙහිය. ඔබ කැමැති ඕනෑම කෙනෙකුව ඔබ පහත් තත්ත්වයට හෙළන්නෙහිය. සියළු යහපත් දේ ඔබගේ අතෙහිය. නිසැකවම සියළු දේ කිරීමේ බලය ඔබ සතුය.

تُوْلِجُ الَّيْلَ فِي النَّهَارِ وَتُوْلِجُ النَّهَارَ فِي الَّيْلِ ۫ وَتُخْرِجُ الْحَيَّ مِنَ الْمَيِّتِ وَتُخْرِجُ الْمَيِّتَ مِنَ الْحَيِّ ۫ وَتَرْزُقُ مَنْ تَشَآءُ بِغَيْرِ حِسَابٍ ﴿٢٨﴾

28. ඔබ රැය දවාලයෙහි ඇතුළු කරන්නෙහිය, තවද දහවල රැයෙහි ඇතුළු කරන්නෙහිය. තවද ඔබ අජීව දැයින් ජීවය හෙළි කරන්නෙහිය, තවද ජීව දැයින් අජීව දේ හෙළි කරන්නෙහිය. තවද ඔබ කැමැති ඕනෑම කෙනෙකුට අප්‍රමාණව ලබා දෙන්නෙහිය'.

لَا يَتَّخِذِ الْمُؤْمِنُوْنَ الْكٰفِرِيْنَ اَوْلِيَآءَ مِنْ دُوْنِ الْمُؤْمِنِيْنَ ۚ وَمَنْ يَّفْعَلْ ذٰلِكَ فَلَيْسَ مِنَ اللّٰهِ فِيْ شَيْءٍ اِلَّآ اَنْ تَتَّقُوْا مِنْهُمْ تُقٰىةً ؕ وَيُحَذِّرُكُمُ اللّٰهُ نَفْسَهٗ ؕ وَاِلَى اللّٰهِ الْمَصِيْرُ ﴿٢٩﴾

* 29. විශ්වාසිතයන් තම මිතුරන් ලෙස විශ්වාසිතයන්ට වඩා වැඩි කැමැත්තෙන් අවිශ්වාසිතයන්ව නොගනිත්වා. තවද කවුරුන් හෝ එලෙස කරන්නේ නම්, නුඹලා ඔවුන්ගෙන් සුපරීක්ෂාකාරීව ආරක්ෂා වුවහොත් මිස ඔහුට අල්ලාහ් සමඟ කිසිඳු සම්බන්ධයක් නොමැත. තවද අල්ලාහ් ඔහුගේ දඬුවම පිළිබඳව නුඹලාට අනතුරු අඟවන්නේය. තවද ආපසු යෑම අල්ලාහ් වෙතටය.

قُلْ اِنْ تُخْفُوْا مَا فِيْ صُدُوْرِكُمْ اَوْ تُبْدُوْهُ يَعْلَمْهُ اللّٰهُ ؕ وَيَعْلَمُ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْاَرْضِ ؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿٣٠﴾

30. පවසන්න, 'නුඹලාගේ සිත් තුළ ඇති දේ නුඹලා සැඟවුවද නැතහොත් එය එළි කළද අල්ලාහ් එය දන්නේය. තවද අහසෙහි ඇති සියළු දේවල්ද පොළොවෙහි ඇති සියළු දේවල්ද ඔහු දන්නේය. තවද සියළු දේ කිරීමට අල්ලාහ් බලසම්පන්නය.'

* සටහන. 29: 'යුහඝ්zසිරු කුමුල්ලාහු නෆ්සහු' ( يُحَذِّرُكُمُ اللّٰهُ نَفْسَهٗ )යන අරාබි පදය වචනානුසාරයෙන් ගත් කළ 'අල්ලාහ්, ඔහු පිළිබඳව නුඹලාට අනතුරු අඟවන්නේය' යන අර්ථය ගෙන දේ. එනම් එහි තේරුම වනුයේ ඔහුගේ විධානයන් සහ අණපනත් සම්බන්ධයෙන් හිතුමතයේ ක්‍රියා කිරීමට එරෙහිව අනතුරු අඟවන්නේය යන්නයි.

31. සෑම ආත්මයක්ම එය කළ (සියළු) යහපත හා එය කළ (සියළු) නපුර එයට ඉදිරියෙන් දිස්වන්නාවූ දිනයේදී (ප්‍රවේසම් වනු). එය හා එම (නපුර) අතර විශාල පරතරයක් තිබිය යුතු යැයි එය කැමැති වනු ඇත. තවද අල්ලාහ්, ඔහුගේ දඬුවම පිළිබඳව නුඹලාට අනතුරු අඟවන්නේය. තවද අල්ලාහ් (ඔහුගේ) දාසයින්ට අතිශයින් සානුකම්පිතය.

يَوْمَ تَجِدُ كُلُّ نَفْسٍ مَّا عَمِلَتْ مِنْ خَيْرٍ مُّحْضَرًا ۚ وَمَا عَمِلَتْ مِن سُوٓءٍ ۚ تَوَدُّ لَوْ أَنَّ بَيْنَهَا وَبَيْنَهُۥٓ أَمَدًۢا بَعِيدًا ۗ وَيُحَذِّرُكُمُ ٱللَّهُ نَفْسَهُۥ ۗ وَٱللَّهُ رَءُوفٌۢ بِٱلْعِبَادِ ﴿٣١﴾

معانقة ٤ عند المتأخرين

32. පවසන්න, 'නුඹලා අල්ලාහ්ව ප්‍රිය කරන්නේ නම් මා අනුගමනය කරනු. (එවිට) අල්ලාහ් නුඹලාව ප්‍රිය කරන අතර නුඹලාගේ වැරදිවලට නුඹලාට සමාව දෙන්නේය. තවද අල්ලාහ් අතිශයින් සමාවන්විතය, දයාබරය.'

قُلْ إِن كُنتُمْ تُحِبُّونَ ٱللَّهَ فَٱتَّبِعُونِى يُحْبِبْكُمُ ٱللَّهُ وَيَغْفِرْ لَكُمْ ذُنُوبَكُمْ ۗ وَٱللَّهُ غَفُورٌ رَّحِيمٌ ﴿٣٢﴾

33. පවසන්න, 'අල්ලාහ් සහ මෙම දූතයාට කීකරු වනු.' නමුත් ඔවුන් පිටු පෑවේ නම් අල්ලාහ් අවිශ්වාසිතයන් හට ප්‍රිය නොකරන්නේ යැ(යි සිහිතබා ගනු.)

قُلْ أَطِيعُوا۟ ٱللَّهَ وَٱلرَّسُولَ ۖ فَإِن تَوَلَّوْا۟ فَإِنَّ ٱللَّهَ لَا يُحِبُّ ٱلْكَٰفِرِينَ ﴿٣٣﴾

34. නියතවශයෙන්ම අල්ලාහ් ආදම්වද නූහ්වද ඉබ්‍රාහීම්ගේ පරපුරද සහ ඉම්රාන්ගේ පරපුරද සියළු ජනතාවන්ට ඉහළින් තෝරා ගත්තේය.

إِنَّ ٱللَّهَ ٱصْطَفَىٰٓ ءَادَمَ وَنُوحًا وَءَالَ إِبْرَٰهِيمَ وَءَالَ عِمْرَٰنَ عَلَى ٱلْعَٰلَمِينَ ﴿٣٤﴾

35. එකිනෙකාට සම්බන්ධකම් ඇති වංශයකි. තවද අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

ذُرِّيَّةًۢ بَعْضُهَا مِنۢ بَعْضٍ ۗ وَٱللَّهُ سَمِيعٌ عَلِيمٌ ﴿٣٥﴾

36. ඉම්රාන්ගේ (පරපුරෙන්) ස්ත්‍රියක් (මෙසේ) පැවසූ අවස්ථාව (සිහිපත් කරනු) 'මාගේ අධිපතියාණෙනි, මාගේ ගැබෙහි ඇති දේ ඔබගේ සේවය සඳහා කැප කිරීමට මා බාර වුයෙමි. එබැවින් ඔබ එය මාගෙන් පිළිගනු මැනව. සැබැවින්ම ඔබ සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.'

إِذْ قَالَتِ ٱمْرَأَتُ عِمْرَٰنَ رَبِّ إِنِّى نَذَرْتُ لَكَ مَا فِى بَطْنِى مُحَرَّرًا فَتَقَبَّلْ مِنِّىٓ ۖ إِنَّكَ أَنتَ ٱلسَّمِيعُ ٱلْعَلِيمُ ﴿٣٦﴾

37. නමුත් ඇය එය ප්‍රසූත කළ කල්හි 'මාගේ අධිපතියාණෙනි, මා ප්‍රසූත කර ඇත්තේ ගැහැණු දරුවෙකි'යි ඇය පැවසුවාය. නමුත් ඇය ප්‍රසූත කළ දෑයද (ඇය සිතමින් සිටි) පිරිමි (දරුවා) (ඇය බිහි කළ) ගැහැණු (දරුවෙකු) මෙන් නොවන බවත් අල්ලාහ් හොඳින් දන්නේය. 'මම ඇයට මර්යම් යන නාමය තැබුවෙමි. තවද මම ඇයවද ඇයගේ පරපුරද, ප්‍රතික්ෂේපිත ෂෙයිතාන්ගෙන් ආරක්‍ෂා කිරීමට ඔබට භාරකරන්නෙමි'(යි කීවාය).

فَلَمَّا وَضَعَتْهَا قَالَتْ رَبِّ إِنِّي وَضَعْتُهَا أُنْثَىٰ وَاللَّهُ أَعْلَمُ بِمَا وَضَعَتْ وَلَيْسَ الذَّكَرُ كَالْأُنْثَىٰ ۖ وَإِنِّي سَمَّيْتُهَا مَرْيَمَ وَإِنِّي أُعِيذُهَا بِكَ وَذُرِّيَّتَهَا مِنَ الشَّيْطَانِ الرَّجِيمِ ﴿٣٧﴾

38. එබැවින් ඇයගේ අධිපතියාණන් ඇයව ඉතා දයාන්විත භාරගැනීමකින් පිළිගෙන ඇයව ඉතා විශිෂ්ඨ ලෙස වැඩෙන්නට සැලැස්වූ අතර zසකරිය්යාව ඇයගේ භාරකරුවා ලෙස පත් කළේය. zසකරිය්යා ඇයගේ කුටියට ගිය සෑම විටම, ඇය සතුව ආහාරපාන ඇතිබව දැක, ඔහු 'ඕ මර්යම්, නුඹට මේවා කොහෙන්ද?'යි විමසුවේය. 'එය අල්ලාහ්ගෙන් යැ'යි ඇය පිළිතුරු දුන්නාය. නියතවශයෙන්ම අල්ලාහ් ඔහු කැමැති ඕනෑම කෙනෙකුට අසීමිතව ලබාදෙන්නේය.

فَتَقَبَّلَهَا رَبُّهَا بِقَبُولٍ حَسَنٍ وَأَنْبَتَهَا نَبَاتًا حَسَنًا وَكَفَّلَهَا زَكَرِيَّا ۖ كُلَّمَا دَخَلَ عَلَيْهَا زَكَرِيَّا الْمِحْرَابَ وَجَدَ عِنْدَهَا رِزْقًا ۖ قَالَ يَا مَرْيَمُ أَنَّىٰ لَكِ هَٰذَا ۖ قَالَتْ هُوَ مِنْ عِنْدِ اللَّهِ ۖ إِنَّ اللَّهَ يَرْزُقُ مَنْ يَشَاءُ بِغَيْرِ حِسَابٍ ﴿٣٨﴾

39. එකල්හිම zසකරිය්යා තම අධිපතියාණන්ගෙන් 'මාගේ අධිපතියාණෙනි, ඔබ වෙතින් මා හට පිවිතුරු පෙළපතක් ලබා දෙනු මැනව. නියතවශයෙන්ම, ඔබ ප්‍රාර්ථනාවන්ට සවන් දෙන්නාය' යි ප්‍රාර්ථනා කළේය.

هُنَالِكَ دَعَا زَكَرِيَّا رَبَّهُ ۖ قَالَ رَبِّ هَبْ لِي مِنْ لَدُنْكَ ذُرِّيَّةً طَيِّبَةً ۖ إِنَّكَ سَمِيعُ الدُّعَاءِ ﴿٣٩﴾

40. තවද ඔහු කුටියෙහි නමස්කාරය ඉටුකරන කල්හි, සුරදූතයින් ඔහුව අමතා 'අල්ලාහ් ඔබ හට යහ්යා පිළිබඳ ශුභාරංචිය දෙන්නේය, ඔහු අල්ලාහ්ගේ වදනේ සත්‍යය සහතික කරන්නෙකු වූ ද ශ්‍රේෂ්ඨයෙකු වූ ද පතිවත රකින්නෙකු වූ ද එමෙන්ම ධාර්මිෂ්ඨ අය අතරෙන් වූ වක්තෘවරයෙකි'යි පැවසූහ.

فَنَادَتْهُ الْمَلَائِكَةُ وَهُوَ قَائِمٌ يُصَلِّي فِي الْمِحْرَابِ أَنَّ اللَّهَ يُبَشِّرُكَ بِيَحْيَىٰ مُصَدِّقًا بِكَلِمَةٍ مِنَ اللَّهِ وَسَيِّدًا وَحَصُورًا وَنَبِيًّا مِنَ الصَّالِحِينَ ﴿٤٠﴾

41. 'මාගේ අධිපතියාණෙනි, වයෝවෘද්ධ බව මා පසුකර සිටින්දිද, මාගේ භාර්යාව වඳව සිටින්දිද මා පුතෙකු ලබන්නේ කෙලෙසද?'යි ඔහු පැවසීය. 'අල්ලාහ් (ගේ පිළිවෙත) එලෙසය. ඔහු කැමති දේ ඔහු කරන්නේය'යි ඔහු (සුරදූතයා) පිළිතුරු දුන්නේය.

قَالَ رَبِّ اَنّٰى يَكُوْنُ لِىْ غُلٰمٌ وَّقَدْ بَلَغَنِىَ الْكِبَرُ وَامْرَاَتِىْ عَاقِرٌ ؕ قَالَ كَذٰلِكَ اللّٰهُ يَفْعَلُ مَا يَشَآءُ ﴿٤١﴾

42. 'මාගේ අධිපතියාණෙනි, මා හට නිමිත්තක් නියම කරනු මැනවැ'යි ඔහු පැවසීය. 'ඔබ සඳහා නිමිත්ත නම්, දින තුනකට ඉඟියෙන් මිස, ඔබ මිනිසුන් සමඟ කථා නොකිරීම වේ. තවද ඔබගේ අධිපතියාණන් අධික ලෙස සිහිකරමින්, සවස්හිද උදයෙහිද ඔහුව කීර්තිමත් කරන්න'යි ඔහු (සුරදූතයා) පිළිතුරු දුන්නේය.

قَالَ رَبِّ اجْعَلْ لِّىْۤ اٰيَةً ؕ قَالَ اٰيَتُكَ اَلَّا تُكَلِّمَ النَّاسَ ثَلٰثَةَ اَيَّامٍ اِلَّا رَمْزًا ؕ وَاذْكُرْ رَّبَّكَ كَثِيْرًا وَّسَبِّحْ بِالْعَشِىِّ وَالْاِبْكَارِ ﴿٤٢﴾ ع

43. තවද සුරදූතයින්, 'ඕ මර්යම්, අල්ලාහ් ඔබව තෝරා ගෙන ඔබව පවිත්‍ර කර (එම කාලයේ) සියලු ජනතාවන්ගේ ස්ත්‍රීන්ට ඉහළින් ඔබව තෝරා ගත්තේයැ'යි පැවසූ අවස්ථාව (සිහිපත් කරනු).

وَاِذْ قَالَتِ الْمَلٰٓئِكَةُ يٰمَرْيَمُ اِنَّ اللّٰهَ اصْطَفٰكِ وَطَهَّرَكِ وَاصْطَفٰكِ عَلٰى نِسَآءِ الْعٰلَمِيْنَ ﴿٤٣﴾

44. 'ඕ මර්යම්, ඔබගේ අධිපතියාණන්ට කීකරු වන්න. තවද ඔබ නළල බිම තබා නමස්කාර කරන්න. තවද නමදින අය හා එක්ව (දෙවියන් පමණක්) නමදින්න'.

يٰمَرْيَمُ اقْنُتِىْ لِرَبِّكِ وَاسْجُدِىْ وَارْكَعِىْ مَعَ الرّٰكِعِيْنَ ﴿٤٤﴾

45. මෙය, අප ඔබ හට අනාවරණය කරන්නාවූ අදෘශ්‍යමාන දේවල්හි ආරංචි අතුරින් එකකි. මර්යම්ගේ භාරකාරත්වය ගන්නේ ඔවුනතුරින් කවුරුන්දැයි දැනගනු පිණිස ඔවුන් ඔවුන්ගේ ඊතල විද්ද කල ඔබ ඔවුන් සමඟ නොසිටියෙහිය. තවද ඔවුන් එකිනෙකා අතර වාද කරමින් සිටි කලද, ඔබ ඔවුන් සමඟ නොසිටියෙහිය.

ذٰلِكَ مِنْ اَنْۢبَآءِ الْغَيْبِ نُوْحِيْهِ اِلَيْكَ ؕ وَمَا كُنْتَ لَدَيْهِمْ اِذْ يُلْقُوْنَ اَقْلَامَهُمْ اَيُّهُمْ يَكْفُلُ مَرْيَمَ ۪ وَمَا كُنْتَ لَدَيْهِمْ اِذْ يَخْتَصِمُوْنَ ﴿٤٥﴾

46. සුරදූතයින් මෙසේ පැවසූ කල්හි, 'ඕ මර්යම්, අල්ලාහ් ඔහු වෙතින් එක් වදනක ශුභාරංචිය ඔබට දෙන්නේය. ඔහුගේ නම මසීහ්, මර්යම් ගේ පුත්

اِذْ قَالَتِ الْمَلٰٓئِكَةُ يٰمَرْيَمُ اِنَّ اللّٰهَ يُبَشِّرُكِ بِكَلِمَةٍ مِّنْهُ ۙ اسْمُهُ الْمَسِيْحُ

عِيسَى ابْنُ مَرْيَمَ وَجِيهًا فِي الدُّنْيَا وَالْآخِرَةِ وَمِنَ الْمُقَرَّبِينَ ﴿٤٦﴾

ඊසා වන අතර මෙලොවෙහිද, මතුවටද ගෞරවයට පාත්‍රවන්නෙහිය. තවද (අල්ලාහ්ගේ) සමීපතාවය පිරිනමනු ලැබූවන් අතර ද වන්නේය.

وَيُكَلِّمُ النَّاسَ فِي الْمَهْدِ وَكَهْلًا وَمِنَ الصَّالِحِينَ ﴿٤٧﴾

47. තවද ඔහු තොටිල්ලෙහිදී ද මැදි වියෙහිදී ද ජනතාවට කථා කරනු ඇති අතර ඔහු ධාර්මිෂ්ඨකයින් අතර ද වන්නේය'.

قَالَتْ رَبِّ أَنَّى يَكُونُ لِي وَلَدٌ وَلَمْ يَمْسَسْنِي بَشَرٌ ۖ قَالَ كَذَٰلِكِ اللَّهُ يَخْلُقُ مَا يَشَاءُ ۚ إِذَا قَضَىٰ أَمْرًا فَإِنَّمَا يَقُولُ لَهُ كُنْ فَيَكُونُ ﴿٤٨﴾

*48. ඇය, 'මාගේ අධිපතියාණෙනි, කිසිඳු මිනිසෙකු මා ස්පර්ශ කර නොමැතිව, මා කෙසේ පුත්‍රයෙකු ලබන්නේ ද,'යි පැවසුවාය. ඔහු (සුරදූතයා මෙසේ) කිවේය. "අල්ලාහ් (ගේ පිළිවෙත) එලෙසය, ඔහු අභිමත දේ ඔහු නිර්මාණය කරයි. ඔහු යම් දෙයක් ගැන තින්දු කළ කල්හි ඔහු එයට 'වනු!'යි කියන්නේය, එය එසේම වන්නේය."

وَيُعَلِّمُهُ الْكِتَابَ وَالْحِكْمَةَ وَالتَّوْرَاةَ وَالْإِنْجِيلَ ﴿٤٩﴾

49. 'එමෙන්ම ඔහු පුස්තකයද, ප්‍රඥාවද තව්රාත් ද ඉන්ජීල් ද ඔහුට උගන්වන්නේය'.

وَرَسُولًا إِلَىٰ بَنِي إِسْرَائِيلَ أَنِّي قَدْ جِئْتُكُمْ بِآيَةٍ مِنْ رَبِّكُمْ ۖ أَنِّي أَخْلُقُ لَكُمْ مِنَ الطِّينِ كَهَيْئَةِ الطَّيْرِ فَأَنْفُخُ فِيهِ فَيَكُونُ طَيْرًا بِإِذْنِ اللَّهِ ۖ وَأُبْرِئُ الْأَكْمَهَ وَالْأَبْرَصَ وَأُحْيِي الْمَوْتَىٰ بِإِذْنِ اللَّهِ ۖ وَأُنَبِّئُكُمْ بِمَا تَأْكُلُونَ وَمَا

50. "තවද ඉස්රාඊලයේ දරුවන් හට (මෙසේ පැවසීමට ඔහුව) දූතයෙකු (කරන්නෙමු)." 'මම නුඹලා වෙතට නුඹලාගේ අධිපතියාණන් වෙතින් සළකුණක් රැගෙන ආවෙමි, (එනම්) මම නුඹලා සඳහා පක්ෂියෙකුගේ හැඩයෙන් යුත් නිර්මාණයක් මැටියෙන් අඹන්නෙමි. පසුව මම එය තුළට (නව ජීවයක්) පිඹින්නෙමි. එවිට එය අල්ලාහ්ගේ විධානයෙන් පියාසර කරන්නාවූ ජීවියකු වනු ඇත. තවද මම රෑ ඇඳිරි රෝගීන්වද, ලාදුරු රෝගීන්වද සුවපත් කරන්නෙමි. අල්ලාහ්ගේ විධානයෙන් එමෙන්ම මළවුන්ට ජීවය දෙන්නෙමි. නුඹලා

* සටහන. 48: "කුන් ෆයකූන්" ( كُنْ فَيَكُونُ )එනම් "වනු!' එය එසේම වන්නේය." යන පදයෙන් අදහස් වන්නේ ශූන්‍යතාවයේ සිට ක්ෂණික විපර්යාසයක් තුළින් පැවැත්මට එන බව නොවේ. එයින් අදහස් වන්නේ දෙවියන් සිතූ මොහොතේ සිට, ඔහුගේ සිතුම් හැඩගැන්වීමට පටන් ගන්නා අතර අවසානයේදී ඔහුගේ කැමැත්ත පරිදිම සිදුවනු ලැබේ.

تَدَّخِرُوْنَ ۙ فِيْ بُيُوْتِكُمْ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيَةً لَّكُمْ اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ۚ ﴿٥٠﴾

අනුභව කරන දෑයත්, නුඹලාගේ ගෙවල්වල නුඹලා ගබඩා කර තබන දෑය ගැනත් මම නුඹලාට දන්වන්නෙමි. නියතවශයෙන්ම නුඹලා විශ්වාසිතයින් නම්, එහිලා නුඹලාට සළකුණක් ඇත.'

وَمُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيَّ مِنَ التَّوْرٰىةِ وَلِاُحِلَّ لَكُمْ بَعْضَ الَّذِيْ حُرِّمَ عَلَيْكُمْ وَجِئْتُكُمْ بِاٰيَةٍ مِّنْ رَّبِّكُمْ ۫ فَاتَّقُوا اللّٰهَ وَاَطِيْعُوْنِ ﴿٥١﴾

51. 'තවද මට පෙර වූ දේ, එනම් තව්රාත් පරිපූර්ණ කිරීමටත්, තවද නුඹලාට තහනම් කර ඇති ඇතැම් දේ නුඹලාට අනුමත කිරීමටත් (මා පැමිණියෙමි). එමෙන්ම නුඹලාගේ අධිපතියාණන් වෙතින් සලකුණක් රැගෙන මම නුඹලා වෙතට ආවෙමි. එබැවින් අල්ලාහ් කෙරෙහි බිය දක්වනු, තවද මා හට අවනත වනු.'

اِنَّ اللّٰهَ رَبِّيْ وَرَبُّكُمْ فَاعْبُدُوْهُ ؕ هٰذَا صِرَاطٌ مُّسْتَقِيْمٌ ﴿٥٢﴾

52. 'නියතවශයෙන්ම අල්ලාහ් මාගේ අධිපතියාණන්ද, නුඹලාගේ අධිපතියාණන්ද වන්නේය. එබැවින් ඔහුම නමදිනු. මෙයම නිවැරදි මාර්ගය වේ.'

فَلَمَّاۤ اَحَسَّ عِيْسٰى مِنْهُمُ الْكُفْرَ قَالَ مَنْ اَنْصَارِيْۤ اِلَى اللّٰهِ ؕ قَالَ الْحَوَارِيُّوْنَ نَحْنُ اَنْصَارُ اللّٰهِ ۚ اٰمَنَّا بِاللّٰهِ ۚ وَاشْهَدْ بِاَنَّا مُسْلِمُوْنَ ﴿٥٣﴾

53. තවද ඔවුන්ගේ ප්‍රතික්ෂේප කිරීම ඊසා වටහාගත් කල්හි, 'අල්ලාහ්ගේ මාර්ගයෙහි මාගේ උදව්කරුවන් වන්නේ කවරහුද'යි ඔහු විමසීය. 'අපි අල්ලාහ්ගේ උදව්කරු වන්නෙමු. අපි අල්ලාහ් කෙරෙහි විශ්වාස කොට ඇත්තෙමු. තවද අපි අවනත වූවන් බවට ඔබ සාක්ෂි දරන්නැ'යි අනුගාමිකයින් පිළිතුරු දුන්හ.

رَبَّنَاۤ اٰمَنَّا بِمَاۤ اَنْزَلْتَ وَاتَّبَعْنَا الرَّسُوْلَ فَاكْتُبْنَا مَعَ الشّٰهِدِيْنَ ﴿٥٤﴾

54. 'අපගේ අධිපතියාණෙනි, ඔබ පහළ කළ දේ කෙරෙහි අපි විශ්වාස කරන්නෙමු. තවද මෙම දූතයාණන් අනුගමනය කරන්නෙමු. එබැවින් ඔබ අපව සාක්ෂි දරන්නන් අතර ලියා තබනු මැනවැ'යි කීවෝය.

وَمَكَرُوْا وَمَكَرَ اللّٰهُ ؕ وَاللّٰهُ خَيْرُ الْمٰكِرِيْنَ ﴿٥٥﴾ ع

55. තවද ඔවුහු (ප්‍රතික්ෂේප කරන්නන්) සැලැසුම් කළහ. අල්ලාහ්ද සැලැසුම් කළේය. තවද සැලැසුම්කරුවන් අතරින් අල්ලාහ් ශ්‍රේෂ්ඨයාය.

اِذْ قَالَ اللّٰهُ يٰعِيْسٰٓى اِنِّىْ مُتَوَفِّيْكَ
وَرَافِعُكَ اِلَيَّ وَمُطَهِّرُكَ مِنَ الَّذِيْنَ
كَفَرُوْا وَجَاعِلُ الَّذِيْنَ اتَّبَعُوْكَ فَوْقَ
الَّذِيْنَ كَفَرُوْٓا اِلٰى يَوْمِ الْقِيٰمَةِ ۚ ثُمَّ اِلَيَّ
مَرْجِعُكُمْ فَاَحْكُمُ بَيْنَكُمْ فِيْمَا كُنْتُمْ
فِيْهِ تَخْتَلِفُوْنَ ﴿٥٦﴾

56. අල්ලාහ් (මෙසේ) පැවසූවිට, 'ඊසා, මම ඔබව (ස්වාභාවික) මරණයට පත් කරන්නෙමි. තවද මා වෙතට ඔබව උසස් කරන්නෙමි. තවද අවිශ්වාසිතයින් (ගේ චෝදනාවන්) ගෙන් ඔබව නිදොස් කරන්නෙමි. තවද පුනරුත්ථාන දිනය දක්වා ඔබව අනුගමනය කරන්නන්ව අවිශ්වාසිතයින්ට ඉහලින් උත්කෘෂ්ට කරන්නෙමි. පසුව නුඹලාගේ ආපසු පැමිණීම මා වෙතටම වේ. තවද නුඹලා මතභේද ඇතිකරමින් සිටි දේ සම්බන්ධව මම නුඹලා අතර විනිශ්චය කරන්නෙමි'.

فَاَمَّا الَّذِيْنَ كَفَرُوْا فَاُعَذِّبُهُمْ عَذَابًا
شَدِيْدًا فِى الدُّنْيَا وَالْاٰخِرَةِ ۖ وَمَا لَهُمْ
مِّنْ نّٰصِرِيْنَ ﴿٥٧﴾

57. 'එබැවින් අවිශ්වාසිතයින් ගත්කල, මෙලොවෙහිදී ද පරලොවෙහිදී ද ඉතා දරුණු දඬුවමක් මම ඔවුනට පමුණුවන්නෙමි. තවද ඔවුනට උදව්කරුවන් කිසිවෙකුත් නොවනු ඇත.'

وَاَمَّا الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ
فَيُوَفِّيْهِمْ اُجُوْرَهُمْ ۗ وَاللّٰهُ لَا يُحِبُّ الظّٰلِمِيْنَ ﴿٥٨﴾

58. 'තවද විශ්වාස කරමින් යහපත් ක්‍රියාවන් කරන්නන් ගත්කල, ඔහු ඔවුන්ගේ තිළිණ මුළුමනින්ම ඔවුනට පිරිනමන්නේය. තවද අල්ලාහ් වැරදිකරුවන් ප්‍රිය නොකරන්නේය.'

ذٰلِكَ نَتْلُوْهُ عَلَيْكَ مِنَ الْاٰيٰتِ وَالذِّكْرِ
الْحَكِيْمِ ﴿٥٩﴾

59. සළකුණුවලින් ද ප්‍රඥවෙන් යුත් අනුශාසනාවෙන් ද අප ඔබට පාරායනා කර දක්වන්නේ මේවාය.

اِنَّ مَثَلَ عِيْسٰى عِنْدَ اللّٰهِ كَمَثَلِ اٰدَمَ ۗ خَلَقَهٗ
مِنْ تُرَابٍ ثُمَّ قَالَ لَهٗ كُنْ فَيَكُوْنُ ﴿٦٠﴾

60. නියතවශයෙන්ම අල්ලාහ් වෙත ඊසාගේ තත්ත්වය ආදම්ගේ තත්ත්වයට සමානය. ඔහු දූවිල්ලෙන් ඔහුව නිර්මාණය කළේය, අනතුරුව ඔහු “වනු!” යි කියූ විට ඔහු එසේ විය.

اَلْحَقُّ مِنْ رَّبِّكَ فَلَا تَكُنْ مِّنَ
الْمُمْتَرِيْنَ ﴿٦١﴾

61. (මෙය) ඔබ අධිපතියාණන්ගෙන් වන සත්‍යය වේ, එබැවින් ඔබ සැක කරන්නන්ගෙන් කෙනෙකු නොවනු.

فَمَنْ حَآجَّكَ فِيْهِ مِنْ بَعْدِ مَا جَآءَكَ مِنَ

62. දැන් ඔබ වෙතට ඥනය

| | |
|---|---|
| පහළවීමෙන් පසු ඔහු (ඊසා) සම්බන්ධයෙන් ඔබ සමඟ කවුරුන් හෝ වාද කරන්නේද, (ඔහුට මෙසේ) පවසන්න, 'එනු, අපගේ පුතුන්වද, නුඹලාගේ පුතුන්වද, අපගේ ස්ත්‍රීන්වද, නුඹලාගේ ස්ත්‍රීන්වද, අපගේ ජනතාවද, නුඹලාගේ ජනතාවද, අපි කැඳවමු. පසුව මුසාවාදීන් මත අල්ලාහ්ගේ ශාපය අයැදමින් ඉතා උනන්දුවෙන් ප්‍රාර්ථනා කරමු.' | الْعِلْمِ فَقُلْ تَعَالَوْا نَدْعُ أَبْنَاءَنَا وَأَبْنَاءَكُمْ وَنِسَاءَنَا وَنِسَاءَكُمْ وَأَنْفُسَنَا وَأَنْفُسَكُمْ ثُمَّ نَبْتَهِلْ فَنَجْعَلْ لَعْنَتَ اللَّهِ عَلَى الْكَاذِبِينَ ﴿٦١﴾ |
| 63. නිශ්චිතවම සත්‍ය වාර්තාව මෙය වේ. අල්ලාහ් හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙකු නැත. තවද නියතවශයෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය. | إِنَّ هَٰذَا لَهُوَ الْقَصَصُ الْحَقُّ ۚ وَمَا مِنْ إِلَٰهٍ إِلَّا اللَّهُ ۚ وَإِنَّ اللَّهَ لَهُوَ الْعَزِيزُ الْحَكِيمُ ﴿٦٢﴾ |
| 64. එහෙත් ඔවුන් ඉවත හැරුණේ නම්, කලබල ඇති කරන්නන්ව අල්ලාහ් මැනැවින් දන්නේ (යැයි මතක තබා ගනු.) | فَإِنْ تَوَلَّوْا فَإِنَّ اللَّهَ عَلِيمٌ بِالْمُفْسِدِينَ ﴿٦٣﴾ |
| 65. පවසන්න, 'එම්බල පුස්තකයෙහි ජනතාවෙනි, අප සහ නුඹලා අතර පොදු සම්මුතියක් වෙතට පැමිණෙනු. එනම් අප අල්ලාහ් හැර අන් කිසිවෙකු නොනමදින්නේ යැයිද, අප කිසිදු සහකරුවෙකු ඔහුට එක් නොකරන්නේ යැයිද අප අතර සමහරුන් අල්ලාහ් හැර සමහරෙකුව දෙවිවරුන් ලෙස නොගන්නේ යැයි'ද වේ. නමුත් ඔවුන් ඉවත හැරුණේ නම්, 'අප (අල්ලාහ්ට) අවනත වුවන් බවට නුඹලා සාක්ෂි දරනු'යි පවසනු. | قُلْ يَا أَهْلَ الْكِتَابِ تَعَالَوْا إِلَىٰ كَلِمَةٍ سَوَاءٍ بَيْنَنَا وَبَيْنَكُمْ أَلَّا نَعْبُدَ إِلَّا اللَّهَ وَلَا نُشْرِكَ بِهِ شَيْئًا وَلَا يَتَّخِذَ بَعْضُنَا بَعْضًا أَرْبَابًا مِنْ دُونِ اللَّهِ ۚ فَإِنْ تَوَلَّوْا فَقُولُوا اشْهَدُوا بِأَنَّا مُسْلِمُونَ ﴿٦٤﴾ |
| 66. එම්බල පුස්තකයෙහි ජනතාවෙනි, තව්රාත් හා ඉන්ජීල් ඔහුට (ඉබ්රාහීම්ට) පසුව පහළ කරනු ලැබුවද නුඹලා ඉබ්රාහීම් පිළිබඳව විවාද කරන්නේ කුමකටද? මින්පසුවත් නුඹලා වටහා නොගන්නේ මන්ද? | يَا أَهْلَ الْكِتَابِ لِمَ تُحَاجُّونَ فِي إِبْرَاهِيمَ وَمَا أُنْزِلَتِ التَّوْرَاةُ وَالْإِنْجِيلُ إِلَّا مِنْ بَعْدِهِ ۚ أَفَلَا تَعْقِلُونَ ﴿٦٥﴾ |
| 67. අසනු! නුඹලාට ඒ පිළිබඳව දැනුම තිබිය දී එය ගැන විවාද කළේ නුඹලාමය. එසේනම් නුඹලාට ඒ පිළිබඳව (කිසිදු) දැනුමක් නොමැති එය ගැන (දැන්) නුඹලා විවාද | هَا أَنْتُمْ هَٰؤُلَاءِ حَاجَجْتُمْ فِيمَا لَكُمْ بِهِ عِلْمٌ فَلِمَ تُحَاجُّونَ فِيمَا لَيْسَ لَكُمْ بِهِ |

عِلْمٌ ۚ وَاللَّهُ يَعْلَمُ وَأَنتُمْ لَا تَعْلَمُونَ ﴿٦٧﴾

කරන්නේ කුමකටද? අල්ලාහ් දන්නේය, තවද නුඹලා නොදන්නෙහුය.

مَا كَانَ إِبْرَٰهِيمُ يَهُودِيًّا وَلَا نَصْرَانِيًّا وَلَٰكِن كَانَ حَنِيفًا مُّسْلِمًا ۖ وَمَا كَانَ مِنَ الْمُشْرِكِينَ ﴿٦٨﴾

68. ඉබ්රාහීම් යුදෙව්වකු හෝ කිතුනුවකු හෝ නොවීය. එහෙත් ඔහු (අල්ලාහ්ට) සදා නැඹුරුවූ අතර (ඔහුට) අවනත වන්නෙකුද විය. තවද ඔහු අන් දෙවිවරුන් (අල්ලාහ්ට) සමාන කරන්නන් අතරින්ද නොවීය.

إِنَّ أَوْلَى النَّاسِ بِإِبْرَٰهِيمَ لَلَّذِينَ اتَّبَعُوهُ وَهَٰذَا النَّبِيُّ وَالَّذِينَ آمَنُوا ۗ وَاللَّهُ وَلِيُّ الْمُؤْمِنِينَ ﴿٦٩﴾

69. නියතවශයෙන්ම මිනිසුන් අතරින් ඉබ්රාහීම් හට ඉතා සමීප අය වනුයේ, ඔහුව අනුගමනය කළ අය ද, මෙම වක්තෘවරයා ද විශ්වාස කරන අය ද වෙති. තවද අල්ලාහ් විශ්වාසිතයින්ගේ මිත්‍රයාය.

وَدَّت طَّائِفَةٌ مِّنْ أَهْلِ الْكِتَابِ لَوْ يُضِلُّونَكُمْ وَمَا يُضِلُّونَ إِلَّا أَنفُسَهُمْ وَمَا يَشْعُرُونَ ﴿٧٠﴾

70. පුස්තකයෙහි ජනතාවගෙන් පිරිසක් නුඹලාව නොමග යැවීමට ඉතා අභිලාෂයෙන් පසු වෙති. එහෙත් ඔවුන් නොමග යවන්නේ අන් කිසිවෙකුවත් නොව තමන්වමය. ඔවුන් වටහා නොගනිති.

يَا أَهْلَ الْكِتَابِ لِمَ تَكْفُرُونَ بِآيَاتِ اللَّهِ وَأَنتُمْ تَشْهَدُونَ ﴿٧١﴾

71. එම්බල පුස්තකයෙහි ජනතාවෙනි, නුඹලා සාක්ෂි දරන්නන්ව සිටියදී අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නේ කුමකටද?

يَا أَهْلَ الْكِتَابِ لِمَ تَلْبِسُونَ الْحَقَّ بِالْبَاطِلِ وَتَكْتُمُونَ الْحَقَّ وَأَنتُمْ تَعْلَمُونَ ﴿٧٢﴾ ع

72. එම්බල පුස්තකයෙහි ජනතාවෙනි, නුඹලා අසත්‍ය සමග සත්‍යය අවුල් කරමින්, දැනුවත්වම සත්‍යය සඟවන්නේ කුමකටද?

وَقَالَت طَّائِفَةٌ مِّنْ أَهْلِ الْكِتَابِ آمِنُوا بِالَّذِي أُنزِلَ عَلَى الَّذِينَ آمَنُوا وَجْهَ النَّهَارِ وَاكْفُرُوا آخِرَهُ لَعَلَّهُمْ

73. තවද පුස්තකයෙහි ජනතාවගෙන් පිරිසක් (මෙසේ) කියති. 'විශ්වාසිතයින්ට අනාවරණය කරනු ලැබූ දෙය කෙරෙහි දවසේ පූර්ව භාගයේදී විශ්වාස කොට, එහි අවසාන භාගයේදී අවිශ්වාස කරනු.

يَرْجِعُوْنَ ﴿٧٣﴾

සමහර විට ඔවුන් යළි හැරෙන්නට ඉඩ ඇත'.

وَلَا تُؤْمِنُوْٓا اِلَّا لِمَنْ تَبِعَ دِيْنَكُمْ ؕ قُلْ اِنَّ الْهُدٰى هُدَى اللّٰهِ ۙ اَنْ يُّؤْتٰٓى اَحَدٌ مِّثْلَ مَآ اُوْتِيْتُمْ اَوْ يُحَآجُّوْكُمْ عِنْدَ رَبِّكُمْ ؕ قُلْ اِنَّ الْفَضْلَ بِيَدِ اللّٰهِ ۚ يُؤْتِيْهِ مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ وَاسِعٌ عَلِيْمٌ ﴿٧٤﴾

* 74. 'තවද නුඹලාගේ ධර්මය අනුගමනය කරන්නෙකු හැර අන් කිසිවෙකුව විශ්වාස නොකරනු' (යි ඔවුන් පවසති) (ඕ වක්තෘවරයාණෙනි) පවසන්න, 'නිශ්චිතවම, මගපෙන්වීම නම් අල්ලාහ්ගේ මගපෙන්වීමය. අත්‍යාවශ්‍ය වන්නේ කුමක්ද නම්, පෙර නුඹලාට දෙන ලද දෙයට සමාන (ඉගැන්වීමක්) සැම කෙනෙකුටම දෙනු ලැබීමයි'. 'නැතහොත් නුඹලාගේ අධිපතියාණන් ඉදිරියෙහි නුඹලා සමග විවාද කිරීමට ඔවුනට අයිතියක් තිබෙන්නට ඉඩ ඇත'. පවසන්න, 'සියළු අනුග්‍රහයන් අල්ලාහ් සතුය. ඔහු කැමැති ඕනෑම කෙනෙකුට ඔහු එය දෙන්නේය. තවද අල්ලාහ් සමෘධි සම්පන්නය, සියල්ල දන්නාය.'

يَّخْتَصُّ بِرَحْمَتِهٖ مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ ذُو الْفَضْلِ الْعَظِيْمِ ﴿٧٥﴾

75. 'ඔහු කැමති ඕනෑම කෙනෙකුව ඔහුගේ දයාව සඳහා ඔහු තෝරා ගන්නේය. තවද අල්ලාහ් අපරිමිත වරප්‍රසාදයෙහි අධිපතියාය'.

وَمِنْ اَهْلِ الْكِتٰبِ مَنْ اِنْ تَاْمَنْهُ بِقِنْطَارٍ يُّؤَدِّهٖٓ اِلَيْكَ ۚ وَمِنْهُمْ مَّنْ اِنْ تَاْمَنْهُ بِدِيْنَارٍ لَّا يُؤَدِّهٖٓ اِلَيْكَ اِلَّا مَا دُمْتَ عَلَيْهِ قَآئِمًا ؕ ذٰلِكَ بِاَنَّهُمْ قَالُوْا لَيْسَ عَلَيْنَا فِى الْاُمِّيّٖنَ سَبِيْلٌ ۚ وَيَقُوْلُوْنَ عَلَى اللّٰهِ الْكَذِبَ وَهُمْ يَعْلَمُوْنَ ﴿٧٦﴾

76. තවද පුස්තකයෙහි ජනතාව අතර ඔබ කවුරුන් හෝ විශ්වාසයෙන් යුතුව වස්තු සම්භාරයක් භාර කළ විට, එය ඔබ වෙත ආපසු දෙන කෙනෙක් ද සිටියි. තවද ඔවුන්ගෙන් ඇතැමෙකුට ඔබ දිනාරයක් විශ්වාසයෙන් යුතුව භාර කළ විට ඔබ (යළි යළිත් ඉල්ලා) සිටියහොත් විනා එය ඔබ වෙත ආපසු නොදෙන කෙනෙක් ද ඔවුනතර සිටියි. ඒ මක් නිසාද යත් 'නූගතුන් සම්බන්ධව නැගෙන චෝදනාවලට අපි බැඳී නොසිටින්නෙමු'යි ඔවුන් පැවසූ නිසාය. තවද ඔවුන් දැනුවත්වම අල්ලාහ්ට විරුද්ධව බොරුවක් පවසන්නෝය.

* සටහන. 74: ශුද්ධවූ වක්තෘවරයාණන්ට (එතුමාට අල්ලාහ්ගේ සාමය සහ ආශිර්වාදය ලැබේවා) පිරිනමන ලද ඉගැන්වීම ඔවුන්ගේ ඉගැන්වීමට සමාන නොවීම හේතුවෙන් පමණක් එතුමාට එරෙහිව විවාද කිරීමට වුයේ යුදෙව්වන් නොවන බව මෙයින් පෙන්නුම් කරයි. නමුත් ඊට පටහැනිව දෙවියන්ගේ පක්ෂපාතිභාවය පෙන්නුම් කරමින්, පුස්තකයේ ජනතාවට අනුග්‍රහය දැක්වීමේදී, ඉස්ලාමීය ජනතාවට කිසිඳු දේව ඉගැන්වීමක් නොලැබුනේ නම්, ඔවුන්ට එරෙහිව විවාද කිරීමේ අයිතිය මොවුන්ට තිබෙනු ඇත. ඉගැන්වීම්වල වෙනස්කම්වලට එදිරිව යුදෙව්වන්ගේ විරුද්ධවීම කිසිසේත්ම අදාල නැත.

77. එසේනොව, එහෙත් කවුරුන් හෝ තමන්ගේ ප්‍රතිඥා ඉටු කරමින්, (අල්ලාහ් කෙරෙහි) බියබැතිමත් වන්නේද, නිශ්චිතවම බියබැතිමතුන්ව අල්ලාහ් ප්‍රිය කරන්නේය.

بَلٰى مَنْ اَوْفٰى بِعَهْدِهٖ وَاتَّقٰى فَاِنَّ اللّٰهَ يُحِبُّ الْمُتَّقِيْنَ ﴿٧٧﴾

78. කවුරුන් හෝ අල්ලාහ් සමඟ වු (ඔවුන්ගේ) ප්‍රතිඥා සහ ඔවුන්ගේ දිවුරුම් අල්ප මිලකට හුවමාරු කරන්නේද ඔවුන්ට මතුලොවෙහි කිසිඳු කොටසක් නොලැබෙනු ඇත. එමෙන්ම පුනරුත්ථාන දිනයේදී අල්ලාහ් ඔවුන් සමඟ කථා නොකරනු ඇත. තවද ඔවුන් දෙස නොබලනු ඇත. තවද ඔහු ඔවුන්ව පවිත්‍ර නොකරනු ඇත. තවද ඔවුන්ට වේදනීය දඬුවමක්ද ඇත.

اِنَّ الَّذِيْنَ يَشْتَرُوْنَ بِعَهْدِ اللّٰهِ وَاَيْمَانِهِمْ ثَمَنًا قَلِيْلًا اُولٰٓئِكَ لَا خَلَاقَ لَهُمْ فِى الْاٰخِرَةِ وَلَا يُكَلِّمُهُمُ اللّٰهُ وَلَا يَنْظُرُ اِلَيْهِمْ يَوْمَ الْقِيٰمَةِ وَلَا يُزَكِّيْهِمْ ۖ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿٧٨﴾

79. තවද නියතවශයෙන්ම ඔවුන් අතර කොටසක් ඇත. ඔවුන් පුස්තකය කියවන විටදී ඔවුන්ගේ දිව හරවන්නෝය. ඒ මන්ද, එය පුස්තකයෙහි (කොටසක්) නොවුවද, නුඹලා එය පුස්තකයෙහි (කොටසක් යැයි) සිතනු පිණිසය. තවද එය අල්ලාහ්ගෙන් නොවුවද, ඔවුහු 'එය අල්ලාහ් වෙතින්යැ'යි පවසති. තවද ඔවුහු දැනුවත්වම අල්ලාහ්ට එරෙහිව බොරුවක් පවසන්නෝය.

وَاِنَّ مِنْهُمْ لَفَرِيْقًا يَّلْوٗنَ اَلْسِنَتَهُمْ بِالْكِتٰبِ لِتَحْسَبُوْهُ مِنَ الْكِتٰبِ وَمَا هُوَ مِنَ الْكِتٰبِ ۚ وَيَقُوْلُوْنَ هُوَ مِنْ عِنْدِ اللّٰهِ وَمَا هُوَ مِنْ عِنْدِ اللّٰهِ ۚ وَيَقُوْلُوْنَ عَلَى اللّٰهِ الْكَذِبَ وَهُمْ يَعْلَمُوْنَ ﴿٧٩﴾

80. අල්ලාහ් යමෙකුට පුස්තකයද ප්‍රඥාවද වක්තෘභාවයද ලබාදුන් පසුව ඔහු මිනිසුන් වෙත, 'අල්ලාහ්ට නොව මා හට දාසයන් වනු'යි පැවසීම මිනිසෙකුට (සුදුසු) නොවේ. එහෙත් (ඔහු මෙසේ කියනු ඇත). 'නුඹලා පුස්තකය උගන්වන හෙයින්ද, නුඹලා (එය) හදාරණ හෙයින්ද, අධිපතියාණන්ට මුළුමනින්ම කැප වනු.'

مَا كَانَ لِبَشَرٍ اَنْ يُّؤْتِيَهُ اللّٰهُ الْكِتٰبَ وَالْحُكْمَ وَالنُّبُوَّةَ ثُمَّ يَقُوْلَ لِلنَّاسِ كُوْنُوْا عِبَادًا لِّىْ مِنْ دُوْنِ اللّٰهِ وَلٰكِنْ كُوْنُوْا رَبّٰنِيّٖنَ بِمَا كُنْتُمْ تُعَلِّمُوْنَ الْكِتٰبَ وَبِمَا كُنْتُمْ تَدْرُسُوْنَ ۙ﴿٨٠﴾

81. නුඹලා සුරදූතයින්වද, වක්තෘවරුන්වද අධිපතින් ලෙස

وَلَا يَاْمُرَكُمْ اَنْ تَتَّخِذُوا الْمَلٰٓئِكَةَ

وَالنَّبِيّٖنَ اَرْبَابًا ؕ اَيَاْمُرُكُمْ بِالْكُفْرِ بَعْدَ اِذْ اَنْتُمْ مُّسْلِمُوْنَ ﴿٨١﴾

ගන්නැයි නුඹලාට අණ කිරීමට ඔහුට (සුදුසු) නොවේ. නුඹලා (දෙවියන්ට) අවනත වූවායින් පසු, ප්‍රතික්ෂේප කිරීමට ඔහු නුඹලාව පොළඹවයි ද?

وَاِذْ اَخَذَ اللّٰهُ مِيْثَاقَ النَّبِيّٖنَ لَمَآ اٰتَيْتُكُمْ مِّنْ كِتٰبٍ وَّحِكْمَةٍ ثُمَّ جَآءَكُمْ رَسُوْلٌ مُّصَدِّقٌ لِّمَا مَعَكُمْ لَتُؤْمِنُنَّ بِهٖ وَلَتَنْصُرُنَّهٗ ؕ قَالَ ءَاَقْرَرْتُمْ وَاَخَذْتُمْ عَلٰى ذٰلِكُمْ اِصْرِىْ ؕ قَالُوْٓا اَقْرَرْنَا ؕ قَالَ فَاشْهَدُوْا وَاَنَا مَعَكُمْ مِّنَ الشّٰهِدِيْنَ ﴿٨٢﴾

82. තවද 'පුස්තකයෙන්ද, ප්‍රඥාවෙන්ද යම් දෙයක් මම නුඹලාට ලබාදී, පසුව නුඹලා වෙත තිබෙන දේ පරිපූර්ණ කරන්නාවූ දූතයෙකු නුඹලා වෙත පැමිණිවිට, නුඹලා ඔහු කෙරෙහි විශ්වාස කළයුතු අතර, ඔහුට උදව් කළයුතුයැ'යි (පවසමින්), අල්ලාහ් වක්තෘවරුන් (මඟින් ජනතාව) ගෙන් ප්‍රතිඥාවක් ලබාගත් අවස්ථාව (සිහිපත් කරනු). (තවද) 'නුඹලා එකඟවන්නෙහුද? තවද මේ (කාරණය) සම්බන්ධයෙන් මා නුඹලා වෙත පවරන්නාවූ වගකීම භාරගන්නෙහුදැ?'යි ඔහු කීවේය. 'අපි එකඟ වෙමු'යි ඔවුහු කීහ. 'එසේනම් නුඹලා සාක්ෂි දරනු, තවද සාක්ෂිකරුවන් අතර මම ද නුඹලා සමඟ වෙමි'යි ඔහු කීය.

فَمَنْ تَوَلّٰى بَعْدَ ذٰلِكَ فَاُولٰٓئِكَ هُمُ الْفٰسِقُوْنَ ﴿٨٣﴾

83. දැන් කවුරුන් හෝ මින් පසුවද පිටුපෑවේ නම්, නියතවශයෙන්ම සීමාව ඉක්මවන්නන් ඔවුහුමය.

اَفَغَيْرَ دِيْنِ اللّٰهِ يَبْغُوْنَ وَلَهٗٓ اَسْلَمَ مَنْ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ طَوْعًا وَّكَرْهًا وَّاِلَيْهِ يُرْجَعُوْنَ ﴿٨٤﴾

84. අහස්හිද පොළොවෙහිද ඇති ඕනෑම කෙනෙක් කැමැත්තෙන් හෝ අකැමැත්තෙන් හෝ ඔහුට අවනත වන කල්හි, අල්ලාහ්ගේ ධර්මය හැර ඔවුන් වෙනත් දෙයක් සොයන්නෝද? තවද ඔහු වෙතටම ඔවුන්ව ආපසු යවනු ලබන්නෝය.

قُلْ اٰمَنَّا بِاللّٰهِ وَمَآ اُنْزِلَ عَلَيْنَا وَمَآ اُنْزِلَ عَلٰٓى اِبْرٰهِيْمَ وَاِسْمٰعِيْلَ وَاِسْحٰقَ وَيَعْقُوْبَ وَالْاَسْبَاطِ وَمَآ اُوْتِىَ مُوْسٰى وَعِيْسٰى وَالنَّبِيُّوْنَ مِنْ

85. පවසන්න, 'අපි අල්ලාහ් කෙරෙහිද, අප වෙත පහළ කරනු ලැබූ දේ කෙරෙහිද, තවද ඉබ්‍රාහීම්, ඉස්මාඊල්, ඉස්හාක්, යඃකූබ් හා (ඔවුන්ගේ) පෙළපත් වෙත පහළ කරනු ලැබූ දේ කෙරෙහිද, මූසාටද ඊසාටද (අන්) වක්තෘවරුන්ටද ඔවුන්ගේ අධිපතියාණන් වෙතින් දෙන ලද දේ කෙරෙහිද අපි විශ්වාස

رَّبِّهِمْ ۖ لَا نُفَرِّقُ بَيْنَ أَحَدٍ مِّنْهُمْ ۖ وَنَحْنُ لَهُ مُسْلِمُونَ ﴿٨٥﴾

කරමු. ඔවුනතර කිසිවෙකුටත් වෙනසක් නොදක්වමු. තවද අපි ඔහුටම අවනත වූවන් වෙමු'.

وَمَن يَبْتَغِ غَيْرَ الْإِسْلَامِ دِينًا فَلَن يُقْبَلَ مِنْهُ ۚ وَهُوَ فِي الْآخِرَةِ مِنَ الْخَاسِرِينَ ﴿٨٦﴾

86. තවද කවුරුන් හෝ ඉස්ලාම් හැර වෙනත් ආගමක් අපේක්ෂා කරන්නේ ද, එය ඔහුගෙන් පිළිගනු නොලබන්නේය, තවද ඔහු මතුලොවෙහිදී පාඩු විඳින්නන් අතර වනු ඇත.

كَيْفَ يَهْدِي اللَّهُ قَوْمًا كَفَرُوا بَعْدَ إِيمَانِهِمْ وَشَهِدُوا أَنَّ الرَّسُولَ حَقٌّ وَجَاءَهُمُ الْبَيِّنَاتُ ۚ وَاللَّهُ لَا يَهْدِي الْقَوْمَ الظَّالِمِينَ ﴿٨٧﴾

87. විශ්වාස කොට, දූතයාණන් සත්‍ය යැයි සාක්ෂි දරා, ඔවුනට පැහැදිලි සාධක ද පැමිණි පසුව අවිශ්වාස කළ ජනතාව හට අල්ලාහ් මග පෙන්වන්නේ කෙසේද? තවද අල්ලාහ් වැරදි කරන ජනතාව හට මග නොපෙන්වයි.

أُولَٰئِكَ جَزَاؤُهُمْ أَنَّ عَلَيْهِمْ لَعْنَةَ اللَّهِ وَالْمَلَائِكَةِ وَالنَّاسِ أَجْمَعِينَ ﴿٨٨﴾

88. මෙවන් අයට ලැබෙන ඵලවිපාකය නම් ඔවුන්ට අල්ලාහ්ගේ ද, සුරදූතයින්ගේ ද මිනිසුන්ගේ ද සියල්ල එක්ව ලැබෙන ශාපයයි.

خَالِدِينَ فِيهَا لَا يُخَفَّفُ عَنْهُمُ الْعَذَابُ وَلَا هُمْ يُنظَرُونَ ﴿٨٩﴾

89. මොවුහු එහිම (ශාපයෙහිම) සිටින්නෝය. ඔවුන්ගේ දඬුවම ලිහිල් නොකරනු ලැබේ. එමෙන්ම ඔවුනට කාල අවකාශයක් දෙනු නොලැබේ.

إِلَّا الَّذِينَ تَابُوا مِن بَعْدِ ذَٰلِكَ وَأَصْلَحُوا فَإِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٩٠﴾

90. පසුතැවිලි වී ඉන්පසු නිවැරදි කරගන්නා අය හැරය. තවද නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

إِنَّ الَّذِينَ كَفَرُوا بَعْدَ إِيمَانِهِمْ ثُمَّ ازْدَادُوا كُفْرًا لَّن تُقْبَلَ تَوْبَتُهُمْ وَأُولَٰئِكَ هُمُ الضَّالُّونَ ﴿٩١﴾

91. නියතවශයෙන්ම විශ්වාස කිරීමෙන් පසු අවිශ්වාස කොට, අනතුරුව අවිශ්වාසයෙහි තවදුරටත් වැඩෙන්නන් ගත්කල ඔවුන්ගේ පසුතැවිලිවීම් භාරගනු නොලැබේ. තවද දුර්මාර්ගයෙහි ගිය අය මොවුහුම වෙති.

إِنَّ الَّذِينَ كَفَرُوا وَمَاتُوا وَهُمْ كُفَّارٌ فَلَنْ يُقْبَلَ مِنْ أَحَدِهِمْ مِلْءُ الْأَرْضِ ذَهَبًا وَلَوِ افْتَدَىٰ بِهِ ۗ أُولَٰئِكَ لَهُمْ عَذَابٌ أَلِيمٌ وَمَا لَهُمْ مِنْ نَاصِرِينَ ﴿٩٢﴾

92. අවිශ්වාස කොට, එමෙන්ම අවිශ්වාසිතයින් ලෙස මිය යන්නන් ගත්කල ඔවුන්ගෙන් කවරෙකු හෝ පොළොව තරමට රත්තරන් වන්දි වශයෙන් දුන්නද, කිසිවිටෙකත් එය භාරගනු නොලබන්නේය. වේදනීය දඬුවමක් ලැබෙනුයේ ඔවුන්ටමය, තවද ඔවුනට උදව් කරන්නන් කිසිවෙකුද නොවනු ඇත.

4 කොටස

لَنْ تَنَالُوا الْبِرَّ حَتَّىٰ تُنْفِقُوا مِمَّا تُحِبُّونَ ۚ وَمَا تُنْفِقُوا مِنْ شَيْءٍ فَإِنَّ اللَّهَ بِهِ عَلِيمٌ ﴿٩٣﴾

93. නුඹලා ප්‍රිය කරන දැයින්, නුඹලා වැය නොකරන තුරු නුඹලාට කිසිවිටෙකත් ධාර්මිෂ්ඨභාවය අත්කරගත නොහැක. නුඹලා කුමන දෙයක් වැය කළද, අල්ලාහ් එය මැනැවින් දන්නේය.

كُلُّ الطَّعَامِ كَانَ حِلًّا لِبَنِي إِسْرَائِيلَ إِلَّا مَا حَرَّمَ إِسْرَائِيلُ عَلَىٰ نَفْسِهِ مِنْ قَبْلِ أَنْ تُنَزَّلَ التَّوْرَاةُ ۗ قُلْ فَأْتُوا بِالتَّوْرَاةِ فَاتْلُوهَا إِنْ كُنْتُمْ صَادِقِينَ ﴿٩٤﴾

94. තව්රාත් පහළ වීමට පෙර ඉස්රාඊල් විසින් තමන්ටම තහනම් කරගත් දේවල් හැරෙන්නට සියළුම ආහාර ඉස්රාඊල් දරුවන් සඳහා නිත්‍යානුකූල කර තිබුණි. පවසන්න, 'එසේ, නුඹලා සත්‍යවාදීන් නම්, තව්රාත් රැගෙන ඇවිත් එය කියවනු'.

فَمَنِ افْتَرَىٰ عَلَى اللَّهِ الْكَذِبَ مِنْ بَعْدِ ذَٰلِكَ فَأُولَٰئِكَ هُمُ الظَّالِمُونَ ﴿٩٥﴾

95. මෙයට පසුව ද, කවුරුන් හෝ අල්ලාහ්ට එරෙහිව දැන් බොරුවක් ගොතන්නේ නම්, වැරදිකරුවන් වන්නේ ඔවුහුමය.

قُلْ صَدَقَ اللَّهُ ۗ فَاتَّبِعُوا مِلَّةَ إِبْرَاهِيمَ حَنِيفًا ۖ وَمَا كَانَ مِنَ الْمُشْرِكِينَ ﴿٩٦﴾

96. පවසන්න, 'අල්ලාහ් සත්‍යය ප්‍රකාශ කළේය. එබැවින් නුඹලා නිරතුරුවම (අල්ලාහ්ට) නැඹුරු වූ ඉබ්රාහිම්ගේ ධර්මය පිළිපදිනු. තවද ඔහු (අල්ලාහ්ට) අන් දෙවිවරුන් සම කරන්නන් අතර නොවූයේය.'

إِنَّ أَوَّلَ بَيْتٍ وُضِعَ لِلنَّاسِ لَلَّذِي بِبَكَّةَ مُبَارَكًا وَهُدًى لِلْعَالَمِينَ ﴿٩٧﴾

97. නියතවශයෙන්ම මිනිස් වර්ගයා වෙනුවෙන් ඉදිකරන ලද ප්‍රථම නිවස ◆බෙකාහිය. එය ආශිර්වාදයෙන් පිරුණා වූද සියළු ජනතාවට මග පෙන්වීමක් ද වේ.

◆මක්කමයේ නිම්නය

فِيهِ آيَاتٌ بَيِّنَاتٌ مَقَامُ إِبْرَاهِيمَ ۖ وَمَنْ دَخَلَهُ كَانَ آمِنًا ۗ وَلِلَّهِ عَلَى النَّاسِ حِجُّ الْبَيْتِ مَنِ اسْتَطَاعَ إِلَيْهِ سَبِيلًا ۚ وَمَنْ كَفَرَ فَإِنَّ اللَّهَ غَنِيٌّ عَنِ الْعَالَمِينَ ﴿٩٨﴾

98. එය තුළ ප්‍රත්‍යක්ෂ සලකුණු ඇත. එහි ඉබ්රාහීම්ගේ ස්ථානය ද වේ. තවද කවුරුන් හෝ එහි ඇතුළු වන්නේ ද සාමයෙන් යුතුව ඇතුළු වන්නේය. එය දෙසට ගමන් කිරීමට හැකියාව තිබෙන මිනිසුන් හට එම නිවස (හජ්) වන්දනා කිරීමේ කාර්යය ඉටු කිරීම අල්ලාහ් අනිවාර්යය කර ඇත. තවද කවුරුන් හෝ අවිශ්වාස කරන්නේ නම්, නියතවශයෙන්ම අල්ලාහ් සියළු මැවීම්වලින් ස්වාධීන (බව ඔහු සිහිතබා ගත යුතු)ය.

قُلْ يَا أَهْلَ الْكِتَابِ لِمَ تَكْفُرُونَ بِآيَاتِ اللَّهِ وَاللَّهُ شَهِيدٌ عَلَىٰ مَا تَعْمَلُونَ ﴿٩٩﴾

99. පවසන්න, 'එම්බල පුස්තකයෙහි ජනතාවෙනි! නුඹලා අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නේ කුමක් නිසාද? තවද අල්ලාහ් නුඹලා කරන දේ ගැන විමසිලිමත්ය'.

قُلْ يَا أَهْلَ الْكِتَابِ لِمَ تَصُدُّونَ عَنْ سَبِيلِ اللَّهِ مَنْ آمَنَ تَبْغُونَهَا عِوَجًا وَأَنْتُمْ شُهَدَاءُ ۗ وَمَا اللَّهُ بِغَافِلٍ عَمَّا تَعْمَلُونَ ﴿١٠٠﴾

100. පවසන්න, 'එම්බල පුස්තකයෙහි ජනතාවෙනි! නුඹලා (එයට) සාක්ෂිකරුවන්ව සිටියදීත්, නුඹලා අල්ලාහ්ගේ මාර්ගයෙන් විශ්වාසිතයින්ව වළක්වමින් එය ඇද කිරීමට තැත් කරන්නේ කුමක් නිසාද? තවද නුඹලා කරන දේ පිළිබඳව අල්ලාහ් නොසැලකිලිමත් නොවේ.'

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا إِنْ تُطِيعُوا فَرِيقًا مِنَ الَّذِينَ أُوتُوا الْكِتَابَ يَرُدُّوكُمْ بَعْدَ إِيمَانِكُمْ كَافِرِينَ ﴿١٠١﴾

101. එම්බල විශ්වාසිතයිනි! නුඹලා පුස්තකය දෙන ලද අයගෙන් කිසියම් පිරිසකට අවනත වුයේ නම්, නුඹලා විශ්වාස කළ පසුවද නැවතත් ඔවුන් නුඹලාව අවිශ්වාසිතයින් බවට හරවනු ඇත.

وَكَيْفَ تَكْفُرُونَ وَأَنْتُمْ تُتْلَىٰ عَلَيْكُمْ آيَاتُ اللَّهِ وَفِيكُمْ رَسُولُهُ ۗ وَمَنْ يَعْتَصِمْ بِاللَّهِ فَقَدْ هُدِيَ إِلَىٰ صِرَاطٍ مُسْتَقِيمٍ ﴿١٠٢﴾ ع

102. අල්ලාහ්ගේ සළකුණු නුඹලාට නැවත නැවතත් පෙන්වා දෙනු ලැබූ කල්හි ද ඔහුගේ දූතයාණන් නුඹලා අතර සිටින කල්හි ද නුඹලා කෙසේ අවිශ්වාස කරන්නෙහුද? තවද කවුරුන් හෝ අල්ලාහ්ව දැඩිව අල්ලා ගන්නේ ද, ඇත්තෙන්ම ඔහු සෘජු මග වෙත යොමුකරන ලද්දේය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا اتَّقُوا اللَّهَ حَقَّ تُقَاتِهِ

103. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ් කෙරෙහි බිය විය යුතු

وَلَا تَمُوتُنَّ إِلَّا وَأَنْتُمْ مُسْلِمُونَ ﴿١٠٣﴾

පරිද්දෙන්ම ඔහුට (අල්ලාහ්ට) බිය දක්වනු. නුඹලා අවනතභාවයෙහි සිටින විටදී මිස නුඹලාට මරණය නොපැමිණෙත්වා!.

وَاعْتَصِمُوا بِحَبْلِ اللَّهِ جَمِيعًا وَلَا تَفَرَّقُوا ۚ وَاذْكُرُوا نِعْمَتَ اللَّهِ عَلَيْكُمْ إِذْ كُنْتُمْ أَعْدَاءً فَأَلَّفَ بَيْنَ قُلُوبِكُمْ فَأَصْبَحْتُمْ بِنِعْمَتِهِ إِخْوَانًا وَكُنْتُمْ عَلَىٰ شَفَا حُفْرَةٍ مِنَ النَّارِ فَأَنْقَذَكُمْ مِنْهَا ۗ كَذَٰلِكَ يُبَيِّنُ اللَّهُ لَكُمْ آيَاتِهِ لَعَلَّكُمْ تَهْتَدُونَ ﴿١٠٤﴾

104. තවද සියල්ලන්ම එක්ව, අල්ලාහ්ගේ කඹය දැඩිව අල්ලා ගනු, තවද නුඹලා භේද නොවනු. තවද නුඹලාට අල්ලාහ්ගෙන් වූ ඔහුගේ අනුග්‍රහය සිහිපත් කරනු. නුඹලා සතුරන්ව සිටියදී, ඔහු නුඹලාගේ හදවත් ස්නේහයෙන් එක් කළේය. එබැවින් ඔහුගේ දයාවෙන් නුඹලා සහෝදරයන් (මෙන්) වූහ. තවද නුඹලා ගිනි පතලක මායිමෙහි සිටියෙහුය. පසුව ඔහු එයින් නුඹලාව මුදවා ගත්තේය. නුඹලා මගපෙන්වනු ලබනු පිණිස මෙලෙස අල්ලාහ් ඔහුගේ විධානයන් නුඹලාට පැහැදිලි කරන්නේය.

وَلْتَكُنْ مِنْكُمْ أُمَّةٌ يَدْعُونَ إِلَى الْخَيْرِ وَيَأْمُرُونَ بِالْمَعْرُوفِ وَيَنْهَوْنَ عَنِ الْمُنْكَرِ ۚ وَأُولَٰئِكَ هُمُ الْمُفْلِحُونَ ﴿١٠٥﴾

105. තවද යහපත වෙතට කැඳවන්නාවූද සාධාරණය අණකරන්නාවූද නපුර වළක්වන්නාවූද මිනිසුන් පිරිසක් නුඹලා අතර සිටිය යුතුය. තවද සෞභාග්‍යමත් වන්නන් මොවුන්මය.

وَلَا تَكُونُوا كَالَّذِينَ تَفَرَّقُوا وَاخْتَلَفُوا مِنْ بَعْدِ مَا جَاءَهُمُ الْبَيِّنَاتُ ۚ وَأُولَٰئِكَ لَهُمْ عَذَابٌ عَظِيمٌ ﴿١٠٦﴾

106. තවද ඔවුන් වෙතට පැහැදිලි සාධක පැමිණි පසුව භේදවී, (ඔවුනතරම) එකඟ නොවූ අය මෙන් නොවනු. තවද ඉමහත් දඬුවමක් ඇත්තේ එවැන්නන් හටය.

يَوْمَ تَبْيَضُّ وُجُوهٌ وَتَسْوَدُّ وُجُوهٌ ۚ فَأَمَّا الَّذِينَ اسْوَدَّتْ وُجُوهُهُمْ أَكَفَرْتُمْ بَعْدَ إِيمَانِكُمْ فَذُوقُوا الْعَذَابَ بِمَا كُنْتُمْ تَكْفُرُونَ ﴿١٠٧﴾

107. එම දිනයෙහි දී, ඇතැම් මුහුණු සුදු පැහැ වනු ඇත. ඇතැම් මුහුණු කළු පැහැ වනු ඇත. එසේ කවරෙකුගේ හෝ මුහුණු කළු පැහැ වන්නේද, (ඔවුනට මෙසේ පවසනු ලැබේ). 'නුඹලා විශ්වාස කිරීමෙන් පසු අවිශ්වාස කළෙහුද? එසේනම් නුඹලා අවිශ්වාස කළ නිසා දඬුවම විඳිනු'

108. තවද කවරෙකුගේ හෝ මුහුණු සුදු පැහැ වන්නේ ද, ඔවුහු අල්ලාහ්ගේ දයාවෙහි සිටිනු ඇත. ඔවුහු එහිම වෙසෙන්නෝය.

وَأَمَّا الَّذِينَ ابْيَضَّتْ وُجُوهُهُمْ فَفِي رَحْمَةِ اللَّهِ ۖ هُمْ فِيهَا خَالِدُونَ ﴿١٠٨﴾

109. අල්ලාහ්ගේ සළකුණු මේවාය, ඒවා සත්‍යයෙන් යුක්තව අපි ඔබට නැවත නැවතත් පෙන්වා දෙන්නෙමු. තවද අල්ලාහ් (ඔහුගේ) මැවීම්වලට කිසිඳු වරදක් කිරීමට කැමති නොවන්නේය.

تِلْكَ آيَاتُ اللَّهِ نَتْلُوهَا عَلَيْكَ بِالْحَقِّ ۗ وَمَا اللَّهُ يُرِيدُ ظُلْمًا لِّلْعَالَمِينَ ﴿١٠٩﴾

110. තවද අහස්හි ඇති සියල්ලද, පොළොවෙහි ඇති සියල්ලද අල්ලාහ් සතුය. තවද සියලු කාර්යයන් (තීරණය සඳහා) ආපසු පමුණුවනු ලබන්නේ අල්ලාහ් වෙතටමය.

وَلِلَّهِ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۚ وَإِلَى اللَّهِ تُرْجَعُ الْأُمُورُ ﴿١١٠﴾

111. නුඹලා මිනිස් වර්ගයාගේ යහපත උදෙසා බිහිකරනු ලැබූ ශ්‍රේෂ්ඨ ජනතාවක් වන්නෙහුය. නුඹලා යහපත් දේ අණ කරමින්, නපුර වළක්වාලමින් අල්ලාහ් කෙරෙහි විශ්වාස කරන්නෙහුය. තවද පුස්තකයෙහි ජනතාවද විශ්වාස කළේ නම් නියතවශයෙන්ම එය ඔවුනට ඉතා යහපත් වන්නට තිබුණි. ඔවුන්ගෙන් ඇතැමෙකු විශ්වාසිතයින් වෙති, නමුත් ඔවුන්ගෙන් බොහෝ දෙනෙකු අවනත නොවන්නෝය.

كُنتُمْ خَيْرَ أُمَّةٍ أُخْرِجَتْ لِلنَّاسِ تَأْمُرُونَ بِالْمَعْرُوفِ وَتَنْهَوْنَ عَنِ الْمُنكَرِ وَتُؤْمِنُونَ بِاللَّهِ ۗ وَلَوْ آمَنَ أَهْلُ الْكِتَابِ لَكَانَ خَيْرًا لَّهُم ۚ مِّنْهُمُ الْمُؤْمِنُونَ وَأَكْثَرُهُمُ الْفَاسِقُونَ ﴿١١١﴾

112. සුළු රිදවීමක් මිස නුඹලාට කිසිඳු හානියක් කිරීමට ඔවුනට නොහැකිය. ඔවුන් නුඹලා සමඟ සටන් කළේ නම් ඔවුන් නුඹලාට ඔවුන්ගේ පිට පැත්ත පෙන්වනු ඇත. පසුව ඔවුනට උදව් නොකරනු ලැබේ.

لَن يَضُرُّوكُمْ إِلَّا أَذًى ۖ وَإِن يُقَاتِلُوكُمْ يُوَلُّوكُمُ الْأَدْبَارَ ثُمَّ لَا يُنصَرُونَ ﴿١١٢﴾

113. අල්ලාහ්ගේ රැකවරණය හෝ මිනිසුන්ගේ රැකවරණය ඔවුනට නොලැබුනහොත්, ඔවුන් කොතැනක සිටියත් අවමානයෙන් පීඩිත තත්ත්වයට පත් කරනු ලබන්නෝය. ඔවුන් අල්ලාහ්ගේ උදහසට ලක්වී ඇති අතර ඔවුන්ව දුක්බර පීඩිත

ضُرِبَتْ عَلَيْهِمُ الذِّلَّةُ أَيْنَ مَا ثُقِفُوا إِلَّا بِحَبْلٍ مِّنَ اللَّهِ وَحَبْلٍ مِّنَ النَّاسِ وَبَاءُوا بِغَضَبٍ مِّنَ اللَّهِ وَضُرِبَتْ عَلَيْهِمُ

الْمَسْكَنَةُ ۚ ذٰلِكَ بِاَنَّهُمْ كَانُوْا يَكْفُرُوْنَ بِاٰيٰتِ اللّٰهِ وَيَقْتُلُوْنَ الْاَنْۢبِيَآءَ بِغَيْرِ حَقٍّ ۚ ذٰلِكَ بِمَا عَصَوْا وَّكَانُوْا يَعْتَدُوْنَ ﴿١١٣﴾

තත්ත්වයට පත් කරන ලදි. මෙයට හේතුව, ඔවුන් අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කර ඔවුන් අසාධාරණ ලෙස වක්තෘවරුන්ව ඝාතනය කිරීමට තැත් කළ නිසාය. මෙය, ඔවුන් කැරලි ගසා සීමාව ඉක්මවමින් සිටි නිසාය.

لَيْسُوْا سَوَآءً ۚ مِنْ اَهْلِ الْكِتٰبِ اُمَّةٌ قَآئِمَةٌ يَّتْلُوْنَ اٰيٰتِ اللّٰهِ اٰنَآءَ الَّيْلِ وَهُمْ يَسْجُدُوْنَ ﴿١١٤﴾

114. ඔවුහු (සියල්ල) එක හා සමාන නොවෙති. පුස්තකයේ ජනතාව අතුරින් (ඔවුන්ගේ ප්‍රතිඥාව) ස්ථිරව රකින්නන් පිරිසක් සිටිති. ඔවුහු රාත්‍රියේ හෝරාවන්හි අල්ලාහ්ගේ වදන් පාරායනා කරමින් (ඔහු ඉදිරියෙහි) නළල බිම තබා (සජදාහ්) නමස්කාර කරති.

يُؤْمِنُوْنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ وَيَاْمُرُوْنَ بِالْمَعْرُوْفِ وَيَنْهَوْنَ عَنِ الْمُنْكَرِ وَيُسَارِعُوْنَ فِى الْخَيْرٰتِ ۚ وَاُولٰٓئِكَ مِنَ الصّٰلِحِيْنَ ﴿١١٥﴾

115. ඔවුහු අල්ලාහ් කෙරෙහිද අවසාන දිනය කෙරෙහිද විශ්වාස කරන අතර යහපත් දේ අණ කරමින් නපුර වළක්වාලමින් යහපත් ක්‍රියාවන්හි එකිනෙකා අතර යුහුසුළුව තරඟ කරන්නෝය. තවද ඔවුහුම ධාර්මිෂ්ඨකයින් අතර වන්නෝය.

وَمَا يَفْعَلُوْا مِنْ خَيْرٍ فَلَنْ يُّكْفَرُوْهُ ۚ وَاللّٰهُ عَلِيْمٌۢ بِالْمُتَّقِيْنَ ﴿١١٦﴾

116. තවද ඔවුන් කුමන යහපත් ක්‍රියාවක් කළද, එයට ලැබිය යුතු තිළිණය ඔවුනට අහිමි කරනු නොලැබේ. තවද බියබැතිමතුන්ව අල්ලාහ් මැනැවින් දන්නේය.

اِنَّ الَّذِيْنَ كَفَرُوْا لَنْ تُغْنِىَ عَنْهُمْ اَمْوَالُهُمْ وَلَآ اَوْلَادُهُمْ مِّنَ اللّٰهِ شَيْـًٔا ۚ وَاُولٰٓئِكَ اَصْحٰبُ النَّارِ ۚ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿١١٧﴾

117. අවිශ්වාස කරන අයට ඔවුන්ගේ වස්තුවද, ඔවුන්ගේ දරුවන්ද අල්ලාහ්ට එරෙහිව අල්ප මාත්‍රයකින් වුවද ඵලක් නොවනු ඇත. තවද ගින්නෙහි සහකරුවන් ඔවුහුමය. ඔවුහු එහිම වෙසෙන්නෝය.

مَثَلُ مَا يُنْفِقُوْنَ فِىْ هٰذِهِ الْحَيٰوةِ الدُّنْيَا

118. වර්තමාන ජීවිතය සඳහා ඔවුන් වැය කරන දැයෙහි උපමාව නම්,

كَمَثَلِ رِيحٍ فِيهَا صِرٌّ أَصَابَتْ حَرْثَ قَوْمٍ ظَلَمُوٓا أَنفُسَهُمْ فَأَهْلَكَتْهُ ۚ وَمَا ظَلَمَهُمُ اللَّهُ وَلَٰكِنْ أَنفُسَهُمْ يَظْلِمُونَ ﴿١١٨﴾

අධික ශීතලෙන් යුත් සුළඟකට සමානය. එය තමන්ටම වැරදි කරගත් ජනතාවගේ අස්වැන්නට පහර දී එය විනාශ කර දමයි. තවද අල්ලාහ් ඔවුනට වරදක් නොකළේය, එහෙත් ඔවුහු තමන්ටම වැරදි කරගත්හ.

يَٰٓأَيُّهَا الَّذِينَ ءَامَنُوا لَا تَتَّخِذُوا بِطَانَةً مِّن دُونِكُمْ لَا يَأْلُونَكُمْ خَبَالًا ۚ وَدُّوا مَا عَنِتُّمْ ۚ قَدْ بَدَتِ الْبَغْضَآءُ مِنْ أَفْوَٰهِهِمْ ۚ وَمَا تُخْفِى صُدُورُهُمْ أَكْبَرُ ۚ قَدْ بَيَّنَّا لَكُمُ الْءَايَٰتِ ۖ إِن كُنتُمْ تَعْقِلُونَ ﴿١١٩﴾

119. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේම ජනතාව හැර (අන් අයව) නුඹලාගේ සමීප මිතුරන් ලෙස නොගනු. ඔවුහු නුඹලාව දූෂිත බවට පත් කිරීමට පසුබට නොවන්නෝය. නුඹලා විපතට පත්වනු දැකීමට ඔවුහු ප්‍රිය කරන්නෝය. ඔවුන්ගේ මුවින් (පිටවන වදන් වලින්) ක්‍රෝධය පෙන්නුම් කරන අතර ඔවුන්ගේ සිත්තුළ සඟවා ඇති දේ බෙහෙවින් දරුණුය. නුඹලා වටහාගන්නේ නම්, අපි නුඹලාට අපගේ අණ පනත් පැහැදිලි කර ඇත්තෙමු.

هَٰٓأَنتُمْ أُولَآءِ تُحِبُّونَهُمْ وَلَا يُحِبُّونَكُمْ وَتُؤْمِنُونَ بِالْكِتَٰبِ كُلِّهِۦ وَإِذَا لَقُوكُمْ قَالُوٓا ءَامَنَّا وَإِذَا خَلَوْا عَضُّوا عَلَيْكُمُ الْأَنَامِلَ مِنَ الْغَيْظِ ۚ قُلْ مُوتُوا بِغَيْظِكُمْ ۗ إِنَّ اللَّهَ عَلِيمٌۢ بِذَاتِ الصُّدُورِ ﴿١٢٠﴾

120. අසනු! ඔවුන්ව ප්‍රිය කරන්නන් වනුයේ නුඹලාය, එහෙත් ඔවුහු නුඹලාව ප්‍රිය නොකරන්නෝය. නුඹලා පුස්තක සියල්ල විශ්වාස කරන්නෙහුය. ඔවුහු නුඹලා හමුවූ විටදී, 'අපි විශ්වාස කරමු'යි කියති. එහෙත් ඔවුහු හුදෙකලාව සිටින කල්හි නුඹලාට එරෙහිව කෝපයෙන් ඔවුන්ගේ ඇඟිලි තුඩු සපන්නෝය. පවසන්න, '(නුඹලා) නුඹලාගේ කෝපයෙහිම විනාශ වනු. (නුඹලාගේ) සිත්තුළ සැඟවුණු දේ නියතවශයෙන්ම අල්ලාහ් මැනැවින් දන්නේය.'

إِن تَمْسَسْكُمْ حَسَنَةٌ تَسُؤْهُمْ وَإِن تُصِبْكُمْ سَيِّئَةٌ يَفْرَحُوا بِهَا ۖ وَإِن تَصْبِرُوا وَتَتَّقُوا لَا يَضُرُّكُمْ كَيْدُهُمْ شَيْـًٔا ۗ إِنَّ اللَّهَ بِمَا يَعْمَلُونَ مُحِيطٌ ﴿١٢١﴾

121. නුඹලාට යම්කිසි යහපතක් සිදුවුණි නම්, එය ඔවුන්ට වේදනාව ගෙනදෙයි. නුඹලාට යම්කිසි නපුරක් සිදුවුණි නම්, එය ගැන ඔවුහු ප්‍රීති වෙති. නමුත් නුඹලා ඉවසිලිවන්තවෙමින්, බියබැතිමත් වන්නේ නම්, ඔවුන්ගේ කුමන්ත්‍රණ නුඹලාට කිසිඳු හානියක් සිදු නොකරයි. නියතවශයෙන්ම අල්ලාහ් ඔවුන් කරන දේ (සියල්ල) වටලන්නේය.

| | |
|---|---|
| 122. තවද විශ්වාසිතයින්හට, යුද්ධය සඳහා වූ ඔවුන්ගේ ස්ථානයන් නියම කරමින් ඔබ හිමිදිරියෙහි ඔබගේ නිවැසියන්ගෙන් පිටත්ව ගිය වේලාව (සිහිපත් කරනු.) අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දන්නාය. | وَاِذْ غَدَوْتَ مِنْ اَهْلِكَ تُبَوِّئُ الْمُؤْمِنِيْنَ مَقَاعِدَ لِلْقِتَالِ ؕ وَاللّٰهُ سَمِيْعٌ عَلِيْمٌ ۙ﴿۱۲۲﴾ |
| 123. නුඹලා අතුරින් කණ්ඩායම් දෙකක්, තමන්ගේ මිතුරා අල්ලාහ් වුවද, බියගුළුකමකට අදහස් කර සිටියෝය. තවද විශ්වාසිතයින් විශ්වාසය තැබිය යුත්තේ අල්ලාහ් කෙරෙහි පමණි. | اِذْ هَمَّتْ طَّآئِفَتٰنِ مِنْكُمْ اَنْ تَفْشَلَا ۙ وَاللّٰهُ وَلِيُّهُمَا ؕ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ﴿۱۲۳﴾ |
| 124. තවද නුඹලා දුර්වලව සිටියදී අල්ලාහ් නුඹලාට බද්ර්හි උපකාර කර ඇත. එබැවින් නුඹලා කෘතඥ වනු පිණිස අල්ලාහ්ව නුඹලාගේ ආරක්ෂකයා ලෙස ගනිවු. | وَلَقَدْ نَصَرَكُمُ اللّٰهُ بِبَدْرٍ وَّاَنْتُمْ اَذِلَّةٌ ۚ فَاتَّقُوا اللّٰهَ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿۱۲۴﴾ |
| 125. 'නුඹලාගේ අධිපතියාණන් (අහසින්) සුරදූතයන් තුන්දහසක් එවා නුඹලාට උපකාර කිරීම නුඹලාට ප්‍රමාණවත් නොවන්නේද?'යි ඔබ විශ්වාසිතයින් හට පැවසූ කල්හි, | اِذْ تَقُوْلُ لِلْمُؤْمِنِيْنَ اَلَنْ يَّكْفِيَكُمْ اَنْ يُّمِدَّكُمْ رَبُّكُمْ بِثَلٰثَةِ اٰلٰفٍ مِّنَ الْمَلٰٓئِكَةِ مُنْزَلِيْنَ ؕ﴿۱۲۵﴾ |
| 126. එසේ නොවන්නේ මන්ද! නුඹලා ඉවසිලිවන්ත වෙමින් ධාර්මිෂ්ඨද වන්නේ නම් ඔවුන් නුඹලා වෙත සැනෙකින් ඉක්මන් වේගයකින් පැමිණෙතොත්, සුරදූතයන් පන්දහසක් ලවා දරුණු ලෙස පහරදී නුඹලාගේ අධිපතියාණන් නුඹලාට උදව් කරන්නේය. | بَلٰٓى ۙ اِنْ تَصْبِرُوْا وَتَتَّقُوْا وَيَاْتُوْكُمْ مِّنْ فَوْرِهِمْ هٰذَا يُمْدِدْكُمْ رَبُّكُمْ بِخَمْسَةِ اٰلٰفٍ مِّنَ الْمَلٰٓئِكَةِ مُسَوِّمِيْنَ ﴿۱۲۶﴾ |
| 127. තවද අල්ලාහ් එය නුඹලා හට ශුභාරංචියක් පමණක් වන ලෙසද එමගින් නුඹලාගේ හදවත් සැනසෙනු පිණිසද කළේය. තවද උපකාර පැමිණෙන්නේ බලසම්පන්න වූද, ප්‍රඥා සම්පන්න වූද අල්ලාහ් වෙතින්ම පමණි. | وَمَا جَعَلَهُ اللّٰهُ اِلَّا بُشْرٰى لَكُمْ وَلِتَطْمَئِنَّ قُلُوْبُكُمْ بِهٖ ؕ وَمَا النَّصْرُ اِلَّا مِنْ عِنْدِ اللّٰهِ الْعَزِيْزِ الْحَكِيْمِ ۙ﴿۱۲۷﴾ |
| 128. (දෙවියන් එලෙස කරනුයේ) ඔහු | لِيَقْطَعَ طَرَفًا مِّنَ الَّذِيْنَ كَفَرُوْٓا اَوْ |

يَكْبِتَهُمْ فَيَنقَلِبُوا خَائِبِينَ ﴿١٢٨﴾

අවිශ්වාසීතයින්ගෙන් කොටසක් විනාශ කිරීමට හෝ ඔවුන්ව අවමානයට පත්කර, එමගින් ඔවුන් කළකිරීමට පත්වී ආපසු හැරී යෑමට හෝ වේ.

لَيْسَ لَكَ مِنَ الْأَمْرِ شَيْءٌ أَوْ يَتُوبَ عَلَيْهِمْ أَوْ يُعَذِّبَهُمْ فَإِنَّهُمْ ظَالِمُونَ ﴿١٢٩﴾

129. ඔහු ඔවුන් වෙතට දයාවයෙන් යුතුව හැරෙයි ද නැතහොත් ඔවුනට දඬුවම් දෙයිද යන කාරණයෙහි ඔබට කිසිඳු සම්බන්ධයක් නොමැත. ඔවුහු වරදකරුවන් වෙති.

وَلِلَّهِ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۚ يَغْفِرُ لِمَن يَشَاءُ وَيُعَذِّبُ مَن يَشَاءُ ۚ وَاللَّهُ غَفُورٌ رَّحِيمٌ ﴿١٣٠﴾

130. තවද අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද අල්ලාහ් සතු වේ. ඔහු කැමැති කවරෙකුට හෝ වේවා ඔහු ක්ෂමාව දෙන්නේය. තවද ඔහු කැමැති කවරෙකුට හෝ වේවා ඔහු දඬුවම් දෙන්නේය. අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَأْكُلُوا الرِّبَا أَضْعَافًا مُّضَاعَفَةً ۖ وَاتَّقُوا اللَّهَ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿١٣١﴾

131. එම්බල විශ්වාසීතයිනි! ගුණාකාර එකතු වීමෙන් යුත් පොලිය ගිල නොදමනු. තවද නුඹලා සෞභාග්‍යමත් වනු පිණිස අල්ලාහ් කෙරෙහි බියවනු.

وَاتَّقُوا النَّارَ الَّتِي أُعِدَّتْ لِلْكَافِرِينَ ﴿١٣٢﴾

132. අවිශ්වාසීතයින් හට පිළියෙල කරන ලද ගින්නට බියවනු.

وَأَطِيعُوا اللَّهَ وَالرَّسُولَ لَعَلَّكُمْ تُرْحَمُونَ ﴿١٣٣﴾

133. තවද නුඹලාට දයාව දක්වනු පිණිස නුඹලා අල්ලාහ්ටද දූතයාණන්ටද අවනත වනු.

وَسَارِعُوا إِلَىٰ مَغْفِرَةٍ مِّن رَّبِّكُمْ وَجَنَّةٍ عَرْضُهَا السَّمَاوَاتُ وَالْأَرْضُ أُعِدَّتْ لِلْمُتَّقِينَ ﴿١٣٤﴾

134. තවද නුඹලාගේ අධිපතියාණන්ගෙන් ක්ෂමාව අයැදීමටද, දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන් සඳහා පිළියෙල කර ඇති අහස් හා පොළොවෙහි වටිනාකම මෙන් වූ ස්වර්ගය වෙතටද, නුඹලා එකිනෙකා යුහුසුළු වනු.

الَّذِينَ يُنفِقُونَ فِي السَّرَّاءِ وَالضَّرَّاءِ وَالْكَاظِمِينَ الْغَيْظَ وَالْعَافِينَ عَنِ

135. මොවුහු සෞභාග්‍යයෙහි ද, විපතෙහිදී ද වැය කරන්නා වූද, තවද මොවුහු කෝපය මැඩපවත්වමින් මිනිසුන්ට ක්ෂමාව

النَّاسِ ۗ وَاللَّهُ يُحِبُّ الْمُحْسِنِينَ ﴿١٣٤﴾

දෙන්නා වූද අය වෙති. අල්ලාහ් යහකම් කරන්නන්ව ප්‍රිය කරන්නේය.

وَالَّذِينَ إِذَا فَعَلُوا فَاحِشَةً أَوْ ظَلَمُوا أَنفُسَهُمْ ذَكَرُوا اللَّهَ فَاسْتَغْفَرُوا لِذُنُوبِهِمْ وَمَن يَغْفِرُ الذُّنُوبَ إِلَّا اللَّهُ وَلَمْ يُصِرُّوا عَلَىٰ مَا فَعَلُوا وَهُمْ يَعْلَمُونَ ﴿١٣٥﴾

136. තවද මොවුනු, කිසියම් පිළිකුල් ක්‍රියාවක් කළේ නම් හෝ තමන්ටම වැරදි කරගත්තේ නම් හෝ, අල්ලාහ් සිහිකරමින් ඔවුන්ගේ පව් සඳහා ක්ෂමාව අයැදිති. පව් ක්ෂමා කළ හැක්කේ අල්ලාහ් හැර කවරෙකුටද? තවද දැනුවත්වම ඔවුන් කළ දැයෙහි නැවත නිරත නොවන්නෝය.

أُولَٰئِكَ جَزَاؤُهُم مَّغْفِرَةٌ مِّن رَّبِّهِمْ وَجَنَّاتٌ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا ۚ وَنِعْمَ أَجْرُ الْعَامِلِينَ ﴿١٣٦﴾

137. ඔවුන්ගේ තිළිණය වන්නේ ඔවුන්ගේ අධිපතියාණන් වෙතින් ක්ෂමාවද, එහි පහතින් ගලා බසිනා ගංගාවලින් යුත් උද්‍යානයන්ද වේ. ඔවුහු එහිම වෙසෙන්නෝය. තවද (යහ) ක්‍රියා කරන්නන්ගේ තිළිණ කොතරම් විශිෂ්ඨද?

قَدْ خَلَتْ مِن قَبْلِكُمْ سُنَنٌ فَسِيرُوا فِي الْأَرْضِ فَانظُرُوا كَيْفَ كَانَ عَاقِبَةُ الْمُكَذِّبِينَ ﴿١٣٧﴾

138. නියතවශයෙන්ම නුඹලාට පෙර (බොහෝ) දේව නියමයන් ඉකුත් වී ඇත. එබැවින් (වක්තෘවරයින්ව) බොරු යැයි සැළකූ අයගේ අවසානය කෙතරම් (නපුරු) වූයේ දැයි පොළොවෙහි සංචාරය කර දැකගනු.

هَٰذَا بَيَانٌ لِّلنَّاسِ وَهُدًى وَمَوْعِظَةٌ لِّلْمُتَّقِينَ ﴿١٣٨﴾

139. මෙය (මෙම කුර්ආනය) මිනිසුන්ට පැහැදිලි ප්‍රකාශයකි, තවද දෙවියන් කෙරෙහි බිය ඇත්තවුනට මග පෙන්වීමක් වන අතර අවවාදයක් ද වේ.

وَلَا تَهِنُوا وَلَا تَحْزَنُوا وَأَنتُمُ الْأَعْلَوْنَ إِن كُنتُم مُّؤْمِنِينَ ﴿١٣٩﴾

140. මන්දෝත්සාහි නොවනු. තවද ශෝක නොවනු. තවද නුඹලා විශ්වාසිතයින් නම්, නියතවශයෙන්ම නුඹලා උසස් තත්ත්වයට පත් වනු ඇත.

إِن يَمْسَسْكُمْ قَرْحٌ فَقَدْ مَسَّ الْقَوْمَ

141. නුඹලාට හානියක් සිදුවුයේ නම්,

قَرْحٌ مِّثْلُهٗ ۗ وَتِلْكَ الْاَيَّامُ نُدَاوِلُهَا بَيْنَ النَّاسِ ۚ وَلِيَعْلَمَ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا وَيَتَّخِذَ مِنْكُمْ شُهَدَآءَ ۗ وَاللّٰهُ لَا يُحِبُّ الظّٰلِمِيْنَ ﴿١٤١﴾

නියතවශයෙන්ම (අවිශ්වාසිත) ජනතාවටද (මීට පෙර) එවැනිම හානියක් අත්වී ඇත. තවද අල්ලාහ් විශ්වාස කරන අයව වෙන් කර දැක්වීමටද, නුඹලා අතරින් සාක්ෂිකරුවන් ගැනීමටද, එවන් දිනයන් මිනිසුන් අතර (ඔවුන් අවවාද ලබනු පිණිස) මාරුවෙන් මාරුවට පැමිණීමට අපි සලස්වන්නෙමු. තවද අල්ලාහ් අසාධාරණ කරන්නන්ව ප්‍රිය නොකරයි.

وَلِيُمَحِّصَ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا وَيَمْحَقَ الْكٰفِرِيْنَ ﴿١٤٢﴾

142. තවද විශ්වාස කරන අයව පවිත්‍රවත් කිරීමටත් අවිශ්වාසිතයින්ව විනාශ කිරීමටත් අල්ලාහ්ට හැකිවේ.

اَمْ حَسِبْتُمْ اَنْ تَدْخُلُوا الْجَنَّةَ وَلَمَّا يَعْلَمِ اللّٰهُ الَّذِيْنَ جٰهَدُوْا مِنْكُمْ وَيَعْلَمَ الصّٰبِرِيْنَ ﴿١٤٣﴾

143. නුඹලා අතරින් (අල්ලාහ්ගේ මාර්ගයෙහි) පරිශ්‍රමයෙහි යෙදෙන්නන් කවුරුන්ද යන්න අල්ලාහ් වෙන් කර හඳුනා නොගන්නා තුරුද ස්ථිරසාර වන්නන් කවුරුන්ද යන්න වෙන් කර හඳුනා නොගන්නා තුරුද නුඹලා ස්වර්ගයට ඇතුළු වනු ඇතැයි නුඹලා සිතන්නෙහුද?

وَلَقَدْ كُنْتُمْ تَمَنَّوْنَ الْمَوْتَ مِنْ قَبْلِ اَنْ تَلْقَوْهُ ۠ فَقَدْ رَاَيْتُمُوْهُ وَاَنْتُمْ تَنْظُرُوْنَ ﴿١٤٤﴾ ع

144. තවද නුඹලා, මෙම මරණය එය හමුවන්නට පෙරදීම පැතුවෙහුය. දැන් නුඹලා අවසානයේදී එය දැකගත්තෙහුය. නුඹලා (තුෂ්නිම්භූත වූවා සේ) බලා සිටින්නෙහුය.

وَمَا مُحَمَّدٌ اِلَّا رَسُوْلٌ ۚ قَدْ خَلَتْ مِنْ قَبْلِهِ الرُّسُلُ ۗ اَفَا۟ئِنْ مَّاتَ اَوْ قُتِلَ انْقَلَبْتُمْ عَلٰٓى اَعْقَابِكُمْ ۗ وَمَنْ يَّنْقَلِبْ عَلٰى عَقِبَيْهِ فَلَنْ يَّضُرَّ اللّٰهَ شَيْـًٔا ۗ وَسَيَجْزِى اللّٰهُ الشّٰكِرِيْنَ ﴿١٤٥﴾

145. තවද මුහම්මද් දූතයෙකු පමණි. සැබැවින්ම ඔහුට පෙර වූ (සියළු) දූ යින් මරණයට පත්වූහ. එබැවින් ඔ_ මිය ගියේ නම් නැතහොත් ඝාතනය කරනු ලැබුවේ නම් නුඹලාගේ විලුඹ මතින් නුඹලා හැරෙන්නෙහුද? තවද තම විලුඹ මතින් කවුරුන් හෝ හැරෙන්නේද, ඔහුට කිසිවිටෙක අල්ලාහ් හට කිසිඳු හානියක් ඇති කල නොහැක. තවද අල්ලාහ් කෘතඥවන්නන් හට නිශ්චිතවම තිළිණ ලබා දෙන්නේය.

وَمَا كَانَ لِنَفْسٍ اَنْ تَمُوْتَ اِلَّا بِاِذْنِ اللّٰهِ كِتٰبًا مُّؤَجَّلًا ؕ وَمَنْ يُّرِدْ ثَوَابَ الدُّنْيَا نُؤْتِهٖ مِنْهَا ۚ وَمَنْ يُّرِدْ ثَوَابَ الْاٰخِرَةِ نُؤْتِهٖ مِنْهَا ؕ وَسَنَجْزِى الشّٰكِرِيْنَ ﴿١٤٦﴾

146. තවද අල්ලාහ්ගේ අවසරයෙන් තොරව කිසිඳු ආත්මයකට මිය යෑමට නොහැක. එය නියමිත කාලයකින් යුත් ඉරණමකි. තවද කවුරුන් හෝ මෙලොවෙහි තිළිණ ප්‍රිය කරන්නේද, අපි එයින් ඔහුට ලබා දෙන්නෙමු. තවද කවුරුන් හෝ මතු ජීවිතයෙහි තිළිණ ප්‍රිය කරන්නේද, අපි එයින් ඔහුට ලබා දෙන්නෙමු. තවද අපි කෘතඥවන්නන් හට නියතවශයෙන්ම තිළිණ ලබා දෙන්නෙමු.

وَكَاَيِّنْ مِّنْ نَّبِىٍّ قُتِلَ ۙ مَعَهٗ رِبِّيُّوْنَ كَثِيْرٌ ۚ فَمَا وَهَنُوْا لِمَاۤ اَصَابَهُمْ فِىْ سَبِيْلِ اللّٰهِ وَمَا ضَعُفُوْا وَمَا اسْتَكَانُوْا ؕ وَاللّٰهُ يُحِبُّ الصّٰبِرِيْنَ ﴿١٤٧﴾

* 147. එමෙන්ම බොහෝ වක්තෘවරුන් වූහ. (ඔවුන්ගේ අනුගාමිකයින්ගේ) අප්‍රමාණ සගයින් ඔවුන් සමග එකතු වී සටන් කළහ. අල්ලාහ්ගේ මාර්ගයෙහි තමන් වෙතට පැමිණි කිසිම (විපතකට) ඔවුහු පසුබට නොවූහ. එමෙන්ම ඔවුන් දුර්වලද නොවූහ. එමෙන්ම (සතුරන් ඉදිරියෙහිදී) ඔවුහු තමන්ව යටහත් කර නොගත්හ. තවද අල්ලාහ් ඉවසිලිවන්තයන් ප්‍රිය කරන්නේය.

وَمَا كَانَ قَوْلَهُمْ اِلَّاۤ اَنْ قَالُوْا رَبَّنَا اغْفِرْ لَنَا ذُنُوْبَنَا وَ اِسْرَافَنَا فِىْۤ اَمْرِنَا وَثَبِّتْ اَقْدَامَنَا وَ انْصُرْنَا عَلَى الْقَوْمِ الْكٰفِرِيْنَ ﴿١٤٨﴾

148. තවද 'අපගේ අධිපතියාණෙනි, අපගේ වැරදිවලට මෙන්ම අපගේ ක්‍රියාවන්හි සීමාව ඉක්මවීම් වලට අපට සමා කළ මැනව, අපගේ පාදයන් ස්ථිර කරනු මැනව, එමෙන්ම අවිශ්වාසිත ජනතාවට එරෙහිව අපට උදව් කරනු මැනව'යි පැවසුවා මිස ඔවුහු කිසිදු වදනක් නොපැවසුහ.

فَاٰتٰىهُمُ اللّٰهُ ثَوَابَ الدُّنْيَا وَحُسْنَ ثَوَابِ الْاٰخِرَةِ ؕ وَاللّٰهُ يُحِبُّ الْمُحْسِنِيْنَ ﴿١٤٩﴾ ع

149. එබැවින් මෙලොවෙහි තිළිණයද තවද මතුවෙහි විශිෂ්ඨ වූ තිළිණයක්ද අල්ලාහ් ඔවුනට දුන්නේය. අල්ලාහ් යහපත් ක්‍රියා කරන්නන්ව ප්‍රිය කරන්නේය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِنْ تُطِيْعُوا الَّذِيْنَ

150. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අවිශ්වාසිතයින්ට අවනත වූයේ නම් ඔවුහු නුඹලාව නුඹලාගේ විලුඹ මතින්

* සටහන. 147: රිබ්බියුන් ( رِبِّيُّوْنَ )යන වදනෙහි ගැබ් වී ඇති දේවත්වය නැමැති ප්‍රධානම අර්ථ දැක්වීම නොමැතිව මෙහිදී රිබ්බියුන් ( رِبِّيُّوْنَ )යන වදන හුදෙක් '(ඔවුන්ගේ අනුගාමිකයින්ගේ) සගයින්' යනුවෙන් පරිවර්තනය කර ඇත. පහත දැක්වෙන විකල්ප පරිවර්තනය අපි යෝජනා කරන්නෙමු. 'ඔවුන් සමග එකතු වී දේවත්වයෙන් යුත් ජනතාව විශාල පිරිසක් සටන් කළහ'

كَفَرُوا يَرُدُّوكُمْ عَلَىٰٓ أَعْقَٰبِكُمْ فَتَنقَلِبُوا۟ خَٰسِرِينَ ﴿١٥٠﴾

ආපසු හැරවීමට සලස්වන්නෝය, තවද නුඹලා පරාජිතයින් බවට පත් වන්නෙහුය.

بَلِ ٱللَّهُ مَوْلَىٰكُمْ ۖ وَهُوَ خَيْرُ ٱلنَّٰصِرِينَ ﴿١٥١﴾

151. එසේ නොව, අල්ලාහ් නුඹලාගේ ආරක්ෂකයාය, තවද ඔහු උදව්කරුවන්ගෙන් ශ්‍රේෂ්ඨයාය.

سَنُلْقِى فِى قُلُوبِ ٱلَّذِينَ كَفَرُوا۟ ٱلرُّعْبَ بِمَآ أَشْرَكُوا۟ بِٱللَّهِ مَا لَمْ يُنَزِّلْ بِهِۦ سُلْطَٰنًا ۖ وَمَأْوَىٰهُمُ ٱلنَّارُ ۚ وَبِئْسَ مَثْوَى ٱلظَّٰلِمِينَ ﴿١٥٢﴾

152. ඔහු කිසිඳු අවසරයක් පහළ නොකර තිබුණද, ඔවුන් අල්ලාහ්ට සහකරුවන් සම කළ නිසා, අවිශ්වාස කළ අයගේ හදවත් තුළට අපි භීතිය හටගන්වන්නෙමු. ඔවුන්ගේ ලැගුම් ස්ථානය ගින්නය. තවද වැරදිකරුවන්ගේ වාසස්ථානය නපුරුය.

وَلَقَدْ صَدَقَكُمُ ٱللَّهُ وَعْدَهُۥٓ إِذْ تَحُسُّونَهُم بِإِذْنِهِۦ ۖ حَتَّىٰٓ إِذَا فَشِلْتُمْ وَتَنَٰزَعْتُمْ فِى ٱلْأَمْرِ وَعَصَيْتُم مِّنۢ بَعْدِ مَآ أَرَىٰكُم مَّا تُحِبُّونَ ۚ مِنكُم مَّن يُرِيدُ ٱلدُّنْيَا وَمِنكُم مَّن يُرِيدُ ٱلْءَاخِرَةَ ۚ ثُمَّ صَرَفَكُمْ عَنْهُمْ لِيَبْتَلِيَكُمْ ۖ وَلَقَدْ عَفَا عَنكُمْ ۗ وَٱللَّهُ ذُو فَضْلٍ عَلَى ٱلْمُؤْمِنِينَ ﴿١٥٣﴾

153. තවද ඔහුගේ අවසරයෙන් නුඹලා ඔවුන්ව ඝාතනය කරමින් ඔවුන්ව විනාශ කරමින් සිටින විට, ඇත්තෙන්ම අල්ලාහ් ඔහුගේ ප්‍රතිඥාව නුඹලාට පරිපූර්ණ කළේය. එහෙත් නුඹලා (යුද්ධ වූ වක්තෘවරයාණන්ට අවනත වීම පිළිබඳව) පැකිලෙමින්, විධානයෙහි සත්‍ය අභිලාෂය සම්බන්ධයෙන් නුඹලා අතර විවාද කරමින්, නුඹලාගේ හදවත් ප්‍රිය කළ දේ (ජයග්‍රහණයෙහි විලාසෙන්) ඔහු නුඹලාට දුන් පසුවද නුඹලා අවනත නොවූ විටදී, (ඔහුගේ උපකාරය ඔහු ආපසු ගත්තේය.) නුඹලා අතර මෙලොව ප්‍රියකළ අයද වූ අතර මතුලොව ප්‍රියකළ අයද වූහ. පසුව ඔහු නුඹලාව පිරික්සනු පිණිස ඔහු ඔවුන්ගෙන් නුඹලාව ඉවත හැරෙව්වේය. තවද ඔහු නියතවශයෙන්ම නුඹලාට ක්ෂමාව දුන්නේය. තවද අල්ලාහ් විශ්වාසිතයින් හට කාරුණිකය.

إِذْ تُصْعِدُونَ وَلَا تَلْوُونَ عَلَىٰٓ أَحَدٍ وَٱلرَّسُولُ يَدْعُوكُمْ فِىٓ أُخْرَىٰكُمْ فَأَثَـٰبَكُمْ غَمًّۢا بِغَمٍّ لِّكَيْلَا تَحْزَنُوا۟ عَلَىٰ مَا فَاتَكُمْ وَلَا مَآ أَصَـٰبَكُمْ ۗ وَٱللَّهُ خَبِيرٌۢ بِمَا تَعْمَلُونَ ﴿١٥٤﴾

*154. දූතයාණන් නුඹලා පිටුපසින් සිට නුඹලාට අඬගැසූ අවස්ථාවේදී, නුඹලා ආපසු හැරී කිසිවෙකු දෙස නොබලා දුවයමින් සිටියෙහුය. එවිට නුඹලාගෙන් ගිලිහී ගිය දේ ගැනද, නුඹලාට අත් වුණු දේ ගැනද නුඹලා ශෝක නොවී සිටිනු පිණිස ඔහු එක් දුකක් වෙනුවට ප්‍රත්‍යුපකාරයක් වශයෙන් තවත් දුකක් දුන්නේය. තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් මැනැවින් විමසිලිමත්ය.

ثُمَّ أَنزَلَ عَلَيْكُم مِّنۢ بَعْدِ ٱلْغَمِّ أَمَنَةً نُّعَاسًا يَغْشَىٰ طَآئِفَةً مِّنكُمْ ۖ وَطَآئِفَةٌ قَدْ أَهَمَّتْهُمْ أَنفُسُهُمْ يَظُنُّونَ بِٱللَّهِ غَيْرَ ٱلْحَقِّ ظَنَّ ٱلْجَـٰهِلِيَّةِ ۖ يَقُولُونَ هَل لَّنَا مِنَ ٱلْأَمْرِ مِن شَىْءٍ ۗ قُلْ إِنَّ ٱلْأَمْرَ كُلَّهُۥ لِلَّهِ ۗ يُخْفُونَ فِىٓ أَنفُسِهِم مَّا لَا يُبْدُونَ لَكَ ۖ يَقُولُونَ لَوْ كَانَ لَنَا مِنَ ٱلْأَمْرِ شَىْءٌ مَّا قُتِلْنَا هَـٰهُنَا ۗ قُل لَّوْ كُنتُمْ فِى بُيُوتِكُمْ لَبَرَزَ ٱلَّذِينَ كُتِبَ عَلَيْهِمُ ٱلْقَتْلُ إِلَىٰ مَضَاجِعِهِمْ ۖ

155. අනතුරුව, දුකකට පසුව ඔහු නුඹලා වෙත සාමය පහළ කළේය. එනම් එම මඳ නින්ද නුඹලාගෙන් පිරිසක් වෙලා ගත් කළ, අනෙක් පිරිස තමන් ගැන සිත් තැවුලෙන් අඥාන සිතුවිල්ල පරිදි අල්ලාහ් ගැන වැරදි ලෙස සිතූහ. '(කටයුතු) තීරණයේදී අපටත් යම් කොටසක් තිබේද?'යි ඔවුහු කීහ. 'සියළු තීරණයන් අල්ලාහ්ටම අයත්යැ'යි ඔබ පවසන්න. ඔබට හෙළි නොකරන්නා වූ දේවල් ඔවුන්ගේ සිත්තුළ ඔවුන් සඟවා ඇත්තාහ. '(කටයුතු) තීරණයේදී අපටත් යම් කොටසක් තිබුණේ නම් අපි මෙහිදී ඝාතනයට ලක් වනු නොලබන්නෙමු'යි ඔවුහු කීහ. පවසන්න, 'නුඹලා නුඹලාගේ නිවැස්වල රැඳී සිටියත් යුද්ධ කිරීම සඳහා අණ කරන ලද්දන් (අල්ලාහ් තම නියමය ඉටු කිරීමට) ඔවුන්ගේ මාරක ස්ථානය වෙතට යනු ඇත. තවද එය අල්ලාහ් නුඹලාගේ සිත් තුළ තිබූ දේ පිරික්සනු පිණිසද නුඹලාගේ හදවත් තුළ තිබූ දේ පවිත්‍ර කිරීම පිණිසද වේ. තවද සිත්හි ඇති

* සටහන. 154: සමහර විටෙකදී විශාල පාඩුවක් සිදුවීමේ තර්ජනය, ඊට සාපේක්ෂව කුඩා වූ, පෙර සිදුවූ පාඩුවන්හි වේදනාව මගින් පිරිමැහෙයි. උහද් යුධ සමයේදී මීට සමාන තත්ත්වයක් පැවතුණි. එනම්, මුස්ලිම් සටන්කාමීන් පුද්කලිකව මුහුණ දෙමින් සිටි දුක් වේදනාවන් සහ පාඩු ශුද්ධ වූ වක්තෘවරයාණන්ගේ (එතුමාට අල්ලාහ්ගේ සාමයද, ආශිර්වාදයද හිමි වේවා) මරණය ගැන පැතිරී ගිය කටකතා හේතුවෙන් මුළුමනින්ම පහ වී ගියේය. පසුව ඔහුගේ දිවි ගැලවුන ආරංචිය ඔවුන්ගේ පරාජයේ හැඟිම ගැඹුරු තෘප්තියක සහ කෘතඥතාවයෙහි හැඟිමකට හැරුණි.

وَلِيَبْتَلِيَ اللّٰهُ مَا فِيْ صُدُوْرِكُمْ وَلِيُمَحِّصَ مَا فِيْ قُلُوْبِكُمْ ۗ وَاللّٰهُ عَلِيْمٌۢ بِذَاتِ الصُّدُوْرِ ﴿١٥٥﴾

දේ අල්ලාහ් මැනැවින් දනියි.

اِنَّ الَّذِيْنَ تَوَلَّوْا مِنْكُمْ يَوْمَ الْتَقَى الْجَمْعٰنِ ۙ اِنَّمَا اسْتَزَلَّهُمُ الشَّيْطٰنُ بِبَعْضِ مَا كَسَبُوْا ۚ وَلَقَدْ عَفَا اللّٰهُ عَنْهُمْ ۗ اِنَّ اللّٰهَ غَفُوْرٌ حَلِيْمٌ ﴿١٥٦﴾

156. (උහද් සටනෙහි) සේනාවන් දෙපිරිස මුණගැසුන දිනයෙහිදී නුඹලාගෙන් පිටුපස හැරුණාවුන්, ඔවුන්ගේ ඇතැම් ක්‍රියාවන් හේතුකොට ගෙන ඔවුන්ව ලිස්සා යෑමට සැළසුම් කළේ නිශ්චිතවම ෂෙයිතාන්ය. නමුත් අල්ලාහ් නිශ්චිතවම ඔවුන්ට දැනටමත් ක්ෂමාව දී ඇත්තේය. සැබැවින්ම, අල්ලාහ් අතිශයින් ක්ෂමාන්විතය, ඉවසිලිවන්තයාය.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَكُوْنُوْا كَالَّذِيْنَ كَفَرُوْا وَقَالُوْا لِاِخْوَانِهِمْ اِذَا ضَرَبُوْا فِى الْاَرْضِ اَوْ كَانُوْا غُزًّى لَّوْ كَانُوْا عِنْدَنَا مَا مَاتُوْا وَمَا قُتِلُوْا ۚ لِيَجْعَلَ اللّٰهُ ذٰلِكَ حَسْرَةً فِيْ قُلُوْبِهِمْ ۗ وَاللّٰهُ يُحْيٖ وَيُمِيْتُ ۗ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿١٥٧﴾

157. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අවිශ්වාස කළවුන් මෙන් නොවනු. තවද ඔවුහු ඔවුන්ගේ සොහොයුරන් පිළිබඳව ඔවුන් (අල්ලාහ්ගේ මාර්ගයේ) මිහිපිට ගමනක නිරත වන විටදී හෝ යුද්ධයට යන විටකදී හෝ 'ඔවුන් අප සමග සිටියේ නම්, ඔවුන් මරණයට පත්වන්නට හෝ ඝාතනයට ලක් නොවන්නට තිබුණි'යි පවසති. (මෙලෙස වන්නේ) අල්ලාහ් එය ඔවුන්ගේ හදවත්හි ශෝකයකට හේතුවක් කිරීමටය. එමෙන්ම ජීවය දෙන්නේද මරණයට පත්කරන්නේද අල්ලාහ්මය. තවද අල්ලාහ් නුඹලා කරන දේ ගැන විමසිලිමත්ය.

وَلَئِنْ قُتِلْتُمْ فِيْ سَبِيْلِ اللّٰهِ اَوْ مُتُّمْ لَمَغْفِرَةٌ مِّنَ اللّٰهِ وَرَحْمَةٌ خَيْرٌ مِّمَّا يَجْمَعُوْنَ ﴿١٥٨﴾

158. තවද නුඹලා අල්ලාහ්ගේ මාර්ගයෙහි ඝාතනය කරනු ලැබුවේ නම් හෝ නුඹලා මිය ගියේ නම්, නියතවශයෙන්ම අල්ලාහ්ගෙන් වන ක්ෂමාවද, දයාවද ඔවුන් රැස් කරන දෙයට වඩා යහපත්ය.

وَلَئِنْ مُّتُّمْ اَوْ قُتِلْتُمْ لَاِلَى اللّٰهِ

159. තවද නුඹලා මිය ගියේ නම් හෝ ඝාතනය කරනු ලැබුවේ නම්

නියතවශයෙන්ම නුඹලා අල්ලාහ් වෙතම එක්රැස් කරනු ලබන්නෙහුය.

تُحْشَرُوْنَ ﴿١٥٩﴾

160. තවද අල්ලාහ් වෙතින් වූ (මහත්) දයාව හේතුවෙන් ඔබ ඔවුන් කෙරෙහි කාරුණික වන්නෙහිය. තවද ඔබ රළු වූ (තවද) තද හදවතක් ඇත්තෙකු වූවා නම්, ඔවුහු නියතවශයෙන්ම ඔබගෙන් පලා යනු ඇත. එබැවින් ඔවුනට සමාව දී ඔවුන් වෙනුවෙන් ක්ෂමාව අයැදින්න. එමෙන්ම (වැදගත්) කටයුතුවලදී ඔවුන්ගෙන් අදහස් විමසන්න. තවද ඔබ තීරණයක් ගත් පසු ඔබගේ විශ්වාසය අල්ලාහ් කෙරෙහි තබන්න. නියතවශයෙන්ම අල්ලාහ් (ඔහු කෙරෙහි) විශ්වාසය තබන්නන්ව ප්‍රිය කරන්නේය.

فَبِمَا رَحْمَةٍ مِّنَ اللّٰهِ لِنْتَ لَهُمْ ۚ وَلَوْ كُنْتَ فَظًّا غَلِيْظَ الْقَلْبِ لَانْفَضُّوْا مِنْ حَوْلِكَ ۖ فَاعْفُ عَنْهُمْ وَاسْتَغْفِرْ لَهُمْ وَشَاوِرْهُمْ فِي الْأَمْرِ ۚ فَإِذَا عَزَمْتَ فَتَوَكَّلْ عَلَى اللّٰهِ ۗ إِنَّ اللّٰهَ يُحِبُّ الْمُتَوَكِّلِيْنَ ﴿١٦٠﴾

161. අල්ලාහ් නුඹලාට උදව් කළේ නම්, කිසිවෙකුටත් නුඹලාව පරාජය කිරීමට නොහැක. නමුත් ඔහු නුඹලාව අත් හැරියේ නම්, එවිට නුඹලාට උපකාර කරන්නේ ඔහු හැර අන් කවරෙක්ද? එසේනම් විශ්වාසිතයින් ඔවුන්ගේ විශ්වාසය තැබිය යුත්තේ අල්ලාහ් වෙතමය.

إِنْ يَّنْصُرْكُمُ اللّٰهُ فَلَا غَالِبَ لَكُمْ ۚ وَإِنْ يَّخْذُلْكُمْ فَمَنْ ذَا الَّذِيْ يَنْصُرُكُمْ مِّنْ بَعْدِهٖ ۗ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ﴿١٦١﴾

162. එමෙන්ම වංක ලෙස කටයුතු කිරීම වක්තෘවරයෙකුට සුදුසු නොවේ. තවද කවුරුන් හෝ වංක ලෙස කටයුතු කළේද, පුනරුත්ථාන දිනයේදී ඔහු වංක වූ දේ (ඔහු සමඟ) ගෙනෙනු ඇත. පසුව සියළු ආත්මයන්ට එය උපයාගත් දේ එයට මුළුමනින්ම ගෙවනු ලැබේ. තවද ඔවුනට අසාධාරණයක් කරනු නොලැබේ.

وَمَا كَانَ لِنَبِيٍّ أَنْ يَّغُلَّ ۗ وَمَنْ يَّغْلُلْ يَأْتِ بِمَا غَلَّ يَوْمَ الْقِيٰمَةِ ۚ ثُمَّ تُوَفّٰى كُلُّ نَفْسٍ مَّا كَسَبَتْ وَهُمْ لَا يُظْلَمُوْنَ ﴿١٦٢﴾

163. අල්ලාහ්ගේ සොම්නස අනුගමනය කරන්නෙකු, අල්ලාහ්ගේ උදහස තමා වෙතට ලඟා කරගත් එලෙසම තමාගේ වාසස්ථානය නිරය වන්නාවූ කෙනෙක් බඳු විය හැකිද? එය නපුරු වූ නවාතැනකි!

أَفَمَنِ اتَّبَعَ رِضْوَانَ اللّٰهِ كَمَنْ بَآءَ بِسَخَطٍ مِّنَ اللّٰهِ وَمَأْوٰىهُ جَهَنَّمُ ۗ وَبِئْسَ الْمَصِيْرُ ﴿١٦٣﴾

164. ඔවුන්ට අල්ලාහ් වෙතින් (නොයෙක්) තරාතිරමෙන් (වූ අනුග්‍රහයන්) ඇත. ඔවුන් කරන දේ අල්ලාහ් දකින්නේය.

هُمْ دَرَجٰتٌ عِنْدَ اللّٰهِ ۗ وَاللّٰهُ بَصِيْرٌۢ بِمَا يَعْمَلُوْنَ ١٦٤

165. ඇත්තෙන්ම, ඔහුගේ සළකුණු ඔවුනට කියා දක්වමින්, ඔවුන්ව පවිත්‍ර කරමින්, තවද ඔවුනට පුස්තකයද ප්‍රඥාවද උගන්වන්නාවූ වක්තෘවරයෙකු ඔවුනතරෙන්ම ඔවුන් වෙතට පහළ කිරීම මගින් අල්ලාහ් විශ්වාසිතයින් හට ඔහුගේ අනුග්‍රහය දැක්වුවේය. තවද එයට පෙර නියතවශයෙන්ම ඔවුන් පැහැදිලි වරදෙහි නිරත වූහ.

لَقَدْ مَنَّ اللّٰهُ عَلَى الْمُؤْمِنِيْنَ اِذْ بَعَثَ فِيْهِمْ رَسُوْلًا مِّنْ اَنْفُسِهِمْ يَتْلُوْا عَلَيْهِمْ اٰيٰتِهٖ وَيُزَكِّيْهِمْ وَيُعَلِّمُهُمُ الْكِتٰبَ وَالْحِكْمَةَ ۚ وَاِنْ كَانُوْا مِنْ قَبْلُ لَفِيْ ضَلٰلٍ مُّبِيْنٍ ١٦٥

166. නුඹලාට කිසියම් විපතක් සිදුවූ විට තවද නුඹලා එය මෙන් දෙගුණයක් (සතුරන්ට) සිදුකළෙහුමය! (එසේ තිබියදීත්) මෙය කොහින්දැයි නුඹලා පවසන්නෙහුය. 'එය නුඹලා වෙතින්මයැ'යි පවසන්න, නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේවල් කෙරෙහි බලසම්පන්නය.

اَوَلَمَّآ اَصَابَتْكُمْ مُّصِيْبَةٌ قَدْ اَصَبْتُمْ مِّثْلَيْهَا ۙ قُلْتُمْ اَنّٰى هٰذَا ۗ قُلْ هُوَ مِنْ عِنْدِ اَنْفُسِكُمْ ۗ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ١٦٦

167. තවද දෙපිරිස් මුණගැසුන දිනයේදී (උහද් සටනේදී), නුඹලාට සිදුවූ (විපත) අල්ලාහ්ගේ අණ පරිදිය. එමෙන්ම (එය එලෙස වුයේ) ඔහු විශ්වාසිතයින් වෙන්කර හඳුනාගැනීම පිණිසය.

وَمَآ اَصَابَكُمْ يَوْمَ الْتَقَى الْجَمْعٰنِ فَبِاِذْنِ اللّٰهِ وَلِيَعْلَمَ الْمُؤْمِنِيْنَ ۙ ١٦٧

168. එමෙන්ම ඔහු කුහකයින් වෙන්කොට හඳුනා ගැනීම පිණිසය. තවද, 'නුඹලා පැමිණෙනු, අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කරනු, තවද (සතුරු ආක්‍රමණය) පලවා හරිනු'යි ඔවුනට පවසන ලදී. 'අපි සටන් කිරීමට දැන සිටියේ නම්, නියතවශයෙන්ම අපි නුඹලාව අනුගමනය කරන්නෙමු'යි ඔවුහු කීහ. එදිනෙහිදී, ඔවුහු විශ්වාසයට වඩා අවිශ්වාසයට සමීපව සිටියහ.

وَلِيَعْلَمَ الَّذِيْنَ نَافَقُوْا ۚ وَقِيْلَ لَهُمْ تَعَالَوْا قَاتِلُوْا فِيْ سَبِيْلِ اللّٰهِ اَوِ ادْفَعُوْا ۗ قَالُوْا لَوْ نَعْلَمُ قِتَالًا لَّاتَّبَعْنٰكُمْ ۗ هُمْ لِلْكُفْرِ يَوْمَئِذٍ اَقْرَبُ مِنْهُمْ لِلْاِيْمَانِ ۚ يَقُوْلُوْنَ بِاَفْوَاهِهِمْ مَّا لَيْسَ فِيْ

ඔවුන්ගේ හදවත් තුළ නොතිබූ දේ ඔවුන්ගේ මුවින් ඔවුහු ප්‍රකාශ කරති. තවද, ඔවුහු සඟවන දේ අල්ලාහ් මැනැවින් දන්නේය.

قُلُوبِهِمْ ۗ وَاللَّهُ أَعْلَمُ بِمَا يَكْتُمُونَ ﴿١٦٨﴾

169. (ඔවුන්) පසෙක රැඳී සිටිමින් ඔවුන්ගේ සොහොයුරන් පිළිබඳව 'ඔවුන් අපට අවනත වූවේ නම්, ඔවුහු ඝාතනය කරනු නොලබන්නෝය'යි පැවසුවේ (ඔවුන්මය.) පවසන්න, 'නුඹලා සත්‍යවාදී නම් නුඹලාගෙන් මරණය වළක්වා ගනිවු'.

الَّذِينَ قَالُوا لِإِخْوَانِهِمْ وَقَعَدُوا لَوْ
أَطَاعُونَا مَا قُتِلُوا ۗ قُلْ فَادْرَءُوا عَنْ
أَنْفُسِكُمُ الْمَوْتَ إِنْ كُنْتُمْ صٰدِقِينَ ﴿١٦٩﴾

170. අල්ලාහ්ගේ මාර්ගයෙහි ඝාතනය කරනු ලැබූවන් මළවුන් යැයි නොසිතනු. නොඑසේය, ඔවුහු තමන්ගේ අධිපතියාණන් අභියස, මහා සැප සම්පත් ලබමින්, ජීවත් වන්නන්ය.

وَلَا تَحْسَبَنَّ الَّذِينَ قُتِلُوا فِي سَبِيلِ اللَّهِ
أَمْوَاتًا ۚ بَلْ أَحْيَاءٌ عِنْدَ رَبِّهِمْ يُرْزَقُونَ ﴿١٧٠﴾

171. අල්ලාහ්, ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුනට ලබා දුන් දේ හේතුවෙන් ඔවුහු ප්‍රීති වන්නෝය. එමෙන්ම, ඔවුනට පසුව ඔවුන් හා මෙතෙක් එක් නොවූවන් පිළිබඳව ප්‍රමුදිත වන්නෝය. මන්ද, යත් ඔවුනට කිසිඳු බියක් (පැමිණෙන්නේද) නැත, තවද ඔවුහු ශෝක වන්නේද නැත.

فَرِحِينَ بِمَا آتٰىهُمُ اللَّهُ مِنْ فَضْلِهِ ۙ
وَيَسْتَبْشِرُونَ بِالَّذِينَ لَمْ يَلْحَقُوا بِهِمْ
مِنْ خَلْفِهِمْ ۙ أَلَّا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ
يَحْزَنُونَ ﴿١٧١﴾

وقف لازم

172. අල්ලාහ්ගේ අනුග්‍රහය සහ ඔහුගේ වරප්‍රසාදය නිසාත්, විශ්වාසිතයින්ගේ තිළිණ අල්ලාහ් නිෂ්ඵල වීමට ඉඩ නොහරින (යන කරුණ) නිසාත් ඔවුහු ප්‍රමුදිත වන්නෝය.

يَسْتَبْشِرُونَ بِنِعْمَةٍ مِنَ اللَّهِ وَفَضْلٍ ۙ
وَأَنَّ اللَّهَ لَا يُضِيعُ أَجْرَ الْمُؤْمِنِينَ ﴿١٧٢﴾

173. ඔවුන් හට හානියක් සිදුවූ පසුවද අල්ලාහ්ගේ සහ දූතයාණන්ගේ කැඳවීමට පිළිතුරු දෙමින්, ඔවුනතුරින් යහපත කරමින්, බියබැතිමත්ව කටයුතු කරන්නන් හට මහත් තිළිණ ඇත.

الَّذِينَ اسْتَجَابُوا لِلَّهِ وَالرَّسُولِ مِنْ بَعْدِ
مَا أَصَابَهُمُ الْقَرْحُ ۛ لِلَّذِينَ أَحْسَنُوا
مِنْهُمْ وَاتَّقَوْا أَجْرٌ عَظِيمٌ ﴿١٧٣﴾

معانقة عند المتقدمين

174. 'නුඹලාට එරෙහිව ජනතාව

الَّذِينَ قَالَ لَهُمُ النَّاسُ إِنَّ النَّاسَ قَدْ

جَمَعُوا لَكُمْ فَاخْشَوْهُمْ فَزَادَهُمْ إِيمَانًا ۖ وَقَالُوا حَسْبُنَا اللَّهُ وَنِعْمَ الْوَكِيلُ ﴿١٧٤﴾

රැස්ව සිටිති. එබැවින් ඔවුනට බිය වනු'යි මිනිසුන් ඔවුනට පැවසූ විට, එයින් ඔවුන්ගේ විශ්වාසය තවදුරටත් අධික වූවා (පමණි). තවද 'අල්ලාහ් අපට ප්‍රමාණවත්ය, තවද ඔහු විශිෂ්ඩ වූ ආරක්ෂකයෙක් යැ'යි ඔවුහු කීහ.

فَانْقَلَبُوا بِنِعْمَةٍ مِنَ اللَّهِ وَفَضْلٍ لَمْ يَمْسَسْهُمْ سُوءٌ وَاتَّبَعُوا رِضْوَانَ اللَّهِ ۗ وَاللَّهُ ذُو فَضْلٍ عَظِيمٍ ﴿١٧٥﴾

175. එබැවින්, කිසිඳු විපතක් ඔවුනට අත් නොවී, ඔවුහු අල්ලාහ්ගෙන් (අති මහත් වූ) අනුග්‍රහයද, (අති උසස් වූ) වරප්‍රසාදයද සමඟ පෙරලා පැමිණියහ. තවද ඔවුහු අල්ලාහ්ගේ කැමැත්ත අනුගමනය කළහ. තවද අල්ලාහ් මහත් වූ වරප්‍රසාද වන්තයාය.

إِنَّمَا ذَٰلِكُمُ الشَّيْطَانُ يُخَوِّفُ أَوْلِيَاءَهُ فَلَا تَخَافُوهُمْ وَخَافُونِ إِنْ كُنْتُمْ مُؤْمِنِينَ ﴿١٧٦﴾

176. තමන්ගේ මිත්‍රයින්ව බිය ගන්වන ඔහු ෂෙයිතාන්ම වේ. එබැවින්, නුඹලා විශ්වාසිතයින් නම්, ඔවුන්ට බිය නොවනු, තවද මා හට බියවනු.

وَلَا يَحْزُنْكَ الَّذِينَ يُسَارِعُونَ فِي الْكُفْرِ ۚ إِنَّهُمْ لَنْ يَضُرُّوا اللَّهَ شَيْئًا ۗ يُرِيدُ اللَّهُ أَلَّا يَجْعَلَ لَهُمْ حَظًّا فِي الْآخِرَةِ ۖ وَلَهُمْ عَذَابٌ عَظِيمٌ ﴿١٧٧﴾

177. එමෙන්ම, අවිශ්වාස කිරීමෙහි ඉක්මන් වන්නන් ඔබව කනස්සල්ලට පත් නොකරත්වා. නියතවශයෙන්ම අල්ලාහ්ට කිසිඳු ආකාරයේ හානියක් කිරීමට ඔවුනට නොහැකිය. අල්ලාහ් මතු ජීවිතයේදී ඔවුනට කිසිඳු කොටසක් වෙන් නොකිරීමට අභිමත කරයි. තවද ඔවුන්ට දැඩි දඬුවමක් ලැබෙනු ඇත.

إِنَّ الَّذِينَ اشْتَرَوُا الْكُفْرَ بِالْإِيمَانِ لَنْ يَضُرُّوا اللَّهَ شَيْئًا ۖ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿١٧٨﴾

178. නියතවශයෙන්ම විශ්වාසය වෙනුවට අවිශ්වාසය මිලදී ගත් අයහට කිසිසේත් අල්ලාහ්ට හානියක් කළ නොහැක. තවද ඔවුන්ට වේදනීය දඬුවමක් ඇත.

وَلَا يَحْسَبَنَّ الَّذِينَ كَفَرُوا أَنَّمَا نُمْلِي لَهُمْ خَيْرٌ لِأَنْفُسِهِمْ ۚ إِنَّمَا نُمْلِي لَهُمْ لِيَزْدَادُوا إِثْمًا ۚ وَلَهُمْ عَذَابٌ مُهِينٌ ﴿١٧٩﴾

179. තවද අප ඔවුනට දෙන විරාමය, ඔවුන්ගේ යහපත පිණිස යැයි අවිශ්වාසිතයින් නොසිතත්වා. අප ඔවුනට දෙන විරාමයේ (ප්‍රතිඵලය) ඔවුන් පාපයෙහි වැඩි වීම පමණි. තවද ඔවුන්ට නින්දිත දඬුවමක් ලැබෙනු ඇත.

مَا كَانَ اللّٰهُ لِيَذَرَ الْمُؤْمِنِيْنَ عَلٰى مَآ اَنْتُمْ عَلَيْهِ حَتّٰى يَمِيْزَ الْخَبِيْثَ مِنَ الطَّيِّبِ ؕ وَمَا كَانَ اللّٰهُ لِيُطْلِعَكُمْ عَلَى الْغَيْبِ وَلٰكِنَّ اللّٰهَ يَجْتَبِىْ مِنْ رُّسُلِهٖ مَنْ يَّشَآءُ ۖ فَاٰمِنُوْا بِاللّٰهِ وَرُسُلِهٖ ۚ وَاِنْ تُؤْمِنُوْا وَتَتَّقُوْا فَلَكُمْ اَجْرٌ عَظِيْمٌ ﴿١٨٠﴾

180. යහපත් අයගෙන් නපුරන්ව වෙන්කර පෙන්වන තෙක්, නුඹලා සිටිය තත්ත්වයෙන්ම සිටීමට අල්ලාහ් විශ්වාසිතයින්ව අත්හරින්නේ නැත. එමෙන්ම අල්ලාහ් නුඹලාට ගුප්ත දේ අනාවරණය කරන්නේද නැත. නමුත් අල්ලාහ් ඔහුගේ දූතයින්ගෙන් තමාට අභිමත අය තෝරා ගන්නේය. එබැවින් නුඹලා අල්ලාහ් කෙරෙහිද, ඔහුගේ දූතයින් කෙරෙහිද විශ්වාස කරනු. නුඹලා විශ්වාස කර ධාර්මිෂ්ඨද වන්නේ නම්, නුඹලාට ඉමහත්වූ තිළිණ ලැබෙනු ඇත.

وَلَا يَحْسَبَنَّ الَّذِيْنَ يَبْخَلُوْنَ بِمَآ اٰتٰىهُمُ اللّٰهُ مِنْ فَضْلِهٖ هُوَ خَيْرًا لَّهُمْ ؕ بَلْ هُوَ شَرٌّ لَّهُمْ ؕ سَيُطَوَّقُوْنَ مَا بَخِلُوْا بِهٖ يَوْمَ الْقِيٰمَةِ ؕ وَلِلّٰهِ مِيْرَاثُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ خَبِيْرٌ ﴿١٨١﴾

181. තවද අල්ලාහ්, ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුන්ට ලබාදුන් දෑයෙහි මසුරුකම් කරන්නන්, එය ඔවුන්ට යහපතක් යැයි නොසිතත්වා. එසේ නොව, එය ඔවුනට නපුරුය. ඔවුහු කුමක් සම්බන්ධයෙන් මසුරුකම් කළේද, පුනරුත්ථාන දිනයේදී ඒවා ඔවුන්ගේ ගෙල වටා කරවළල්ලක් සේ පළඳවනු ලැබේ. තවද අහස්හිද, පොළොවෙහිද උරුමය අල්ලාහ් සතුය. තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් මැනැවින් විමසිලිමත්ය.

لَقَدْ سَمِعَ اللّٰهُ قَوْلَ الَّذِيْنَ قَالُوْٓا اِنَّ اللّٰهَ فَقِيْرٌ وَّنَحْنُ اَغْنِيَآءُ ۘ سَنَكْتُبُ مَا قَالُوْا وَقَتْلَهُمُ الْاَنْبِيَآءَ بِغَيْرِ حَقٍّ ۙ وَّنَقُوْلُ ذُوْقُوْا عَذَابَ الْحَرِيْقِ ﴿١٨٢﴾

182. තවද 'අල්ලාහ් දිළිඳුය, අප ධනවතුන් යැ'යි කියූ අයගේ ප්‍රකාශය නියතවශයෙන්ම අල්ලාහ් අසා ඇත. ඔවුන් පැවසූ දෙයද, ඔවුන් අසාධාරණ ලෙස වක්තෘවරුන් ඝාතනය කිරීමට තැත් කිරීමද අපි (නිශ්චිතවම) සටහන් කර තබන්නෙමු. තවද 'නුඹලා දැවෙන්නාවූ දඬුවම විඳිනු'යි අපි කියන්නෙමු.

ذٰلِكَ بِمَا قَدَّمَتْ اَيْدِيْكُمْ وَاَنَّ اللّٰهَ لَيْسَ بِظَلَّامٍ لِّلْعَبِيْدِ ﴿١٨٣﴾

183. මෙය නුඹලාගේ අත් පෙර යවා ඇති දේ හේතු කොට ගෙනය, තවද (සත්‍යය නම්) අල්ලාහ් (ඔහුගේ) දාසයින්හට කිසිසේත්ම අසාධාරණ නොවන්නේය.

اَلَّذِيْنَ قَالُوْٓا اِنَّ اللّٰهَ عَهِدَ اِلَيْنَآ اَلَّا نُؤْمِنَ لِرَسُوْلٍ حَتّٰى يَاْتِيَنَا بِقُرْبَانٍ تَاْكُلُهُ النَّارُ ؕ قُلْ قَدْ جَآءَكُمْ رُسُلٌ مِّنْ قَبْلِىْ بِالْبَيِّنٰتِ وَبِالَّذِىْ قُلْتُمْ فَلِمَ قَتَلْتُمُوْهُمْ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿١٨٤﴾

184. 'ගින්න ගිලගන්නා වූ පිදවිල්ලක් අප වෙත ඔහු රැගෙන එන තුරු කිසිඳු දූතයෙකු කෙරෙහි විශ්වාස නොකරන ලෙස අල්ලාහ් අපට අණකර ඇත්තේය'යි කියන්නන් හට පවසන්න, 'පැහැදිලි සළකුණු සමඟ ද නුඹලා පවසන දේ සමඟ ද මට පෙර නුඹලා වෙත කලින් දූතයින් පැමිණියහ. නුඹලා සත්‍යවාදීන් නම්, ඔවුන්ව ඝාතනය කිරීමට තැත් කළේ කුමක් නිසාද?'

فَاِنْ كَذَّبُوْكَ فَقَدْ كُذِّبَ رُسُلٌ مِّنْ قَبْلِكَ جَآءُوْ بِالْبَيِّنٰتِ وَالزُّبُرِ وَالْكِتٰبِ الْمُنِيْرِ ﴿١٨٥﴾

185. තවද ඔවුන් ඔබ බොරු පවසන්නේ යැයි චෝදනා කරත් නම්, පැහැදිලි සළකුණු ද, ප්‍රඥාවෙන් යුත් ග්‍රන්ථ ද, ආලෝකමත් පුස්තකය ද රැගෙන ඔබට පෙර පැමිණි දූතයින් ද මෙලෙසම බොරු පවසන්නේ යැයි චෝදනා කරනු ලැබූහ.

كُلُّ نَفْسٍ ذَآئِقَةُ الْمَوْتِ ؕ وَاِنَّمَا تُوَفَّوْنَ اُجُوْرَكُمْ يَوْمَ الْقِيٰمَةِ ؕ فَمَنْ زُحْزِحَ عَنِ النَّارِ وَاُدْخِلَ الْجَنَّةَ فَقَدْ فَازَ ؕ وَمَا الْحَيٰوةُ الدُّنْيَآ اِلَّا مَتَاعُ الْغُرُوْرِ ﴿١٨٦﴾

186. සෑම ජීවයක්ම මරණය අත් විඳිය යුතු වන්නේය. නුඹලාගේ තිළිණ මුළුමනින්ම නුඹලාට දෙනු ලබන්නේ පුනරුත්ථාන දිනයේදී පමණි. එබැවින් කවුරුන් හෝ ගින්නෙන් ඉවත් කරනු ලැබ ස්වර්ගයට ප්‍රවේශ කරනු ලැබුවේද, ඇත්තෙන්ම ඔහුගේ අරමුණ අත්කර ගත්තේය. තවද මෙලොව ජීවිතය මායාකාරී ආස්වාදයක් මිස අන් කිසිවක් නොවේ.

لَتُبْلَوُنَّ فِىْٓ اَمْوَالِكُمْ وَاَنْفُسِكُمْ ۟ وَلَتَسْمَعُنَّ مِنَ الَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ مِنْ قَبْلِكُمْ وَمِنَ الَّذِيْنَ اَشْرَكُوْٓا اَذًى كَثِيْرًا ؕ وَاِنْ تَصْبِرُوْا وَتَتَّقُوْا فَاِنَّ ذٰلِكَ مِنْ عَزْمِ الْاُمُوْرِ ﴿١٨٧﴾

187. නුඹලා සතු වස්තුවෙන් ද නුඹලාගේ ජනයාගෙන් ද නියතවශයෙන්ම නුඹලා පිරික්සනු ලබන්නෙහුය. එමෙන්ම නුඹලාට පෙර පුස්තකය දෙන ලද්දවුන්ගෙන්ද, (අල්ලාහ්ට) සමානයන් තබන්නන්ගෙන්ද බොහෝ හානිකර දේවල් නිසැකවම නුඹලා අසන්නෙහුය. නමුත් නුඹලා ඉවසීම පෙන්වමින් ධාර්මිෂ්ඨව කියා කරන්නේ නම්, ඇත්තෙන්ම එය දැඩි අධිෂ්ඨානයෙන් යුත් (කාර්යයකි).

188. තවද අල්ලාහ්, 'නුඹලා මෙම (පුස්තකය) මිනිසුන් හට දැනගැනීමට සැලැස්විය යුතු යැයිද, නුඹලා එය නොසැඟවිය යුතුයැ'යි ද (පවසමින්) පුස්තකය දෙන ලද්දවුන්ගෙන් ප්‍රතිඥාවක් ලබාගත් අවස්ථාව ද (සිහිපත් කරනු). එහෙත් ඔවුහු එය ඔවුන්ගේ පිටුපසට විසි කළහ. තවද, එය අල්ප මිළකට හුවමාරු කළහ. ඔවුන් මිළදී ගත් දේ ඉතා නපුරුය.

وَإِذْ أَخَذَ ٱللَّهُ مِيثَٰقَ ٱلَّذِينَ أُوتُوا۟ ٱلْكِتَٰبَ لَتُبَيِّنُنَّهُۥ لِلنَّاسِ وَلَا تَكْتُمُونَهُۥ فَنَبَذُوهُ وَرَآءَ ظُهُورِهِمْ وَٱشْتَرَوْا۟ بِهِۦ ثَمَنًا قَلِيلًا ۖ فَبِئْسَ مَا يَشْتَرُونَ ﴿١٨٨﴾

189. තමන් කළ දේ ගැන උද්දාම වන්නා වූ එමෙන්ම තමන් නොකළ දෙයට ප්‍රශංසා ලබන්නට ආශා වන්නා වූ ඔවුන් ගැන නොසිතනු. තවද ඔවුන් දඬුවමින් ආරක්ෂිත යැයි ද නොසිතනු. ඔවුන්ට වේදනිය දඬුවමක් ලැබෙනු ඇත.

لَا تَحْسَبَنَّ ٱلَّذِينَ يَفْرَحُونَ بِمَآ أَتَوا۟ وَّيُحِبُّونَ أَن يُحْمَدُوا۟ بِمَا لَمْ يَفْعَلُوا۟ فَلَا تَحْسَبَنَّهُم بِمَفَازَةٍ مِّنَ ٱلْعَذَابِ ۖ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿١٨٩﴾

190. තවද අහස්හිද, පොළොවෙහිද රාජ්‍යය අල්ලාහ්ට සතුය. තවද සියළු දේ කෙරෙහි අල්ලාහ් බල සම්පන්නය.

وَلِلَّهِ مُلْكُ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ ۗ وَٱللَّهُ عَلَىٰ كُلِّ شَىْءٍ قَدِيرٌ ﴿١٩٠﴾

191. අහස් සහ පොළොව මැවීමෙහිද රාත්‍රිය සහ දවාල මාරුවීමෙහිද ඇත්තෙන්ම වටහාගන්නා මිනිසුන් හට සළකුණු ඇත.

إِنَّ فِى خَلْقِ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ وَٱخْتِلَٰفِ ٱلَّيْلِ وَٱلنَّهَارِ لَءَايَٰتٍ لِّأُو۟لِى ٱلْأَلْبَٰبِ ﴿١٩١﴾

192. ඔවුහු සිට ගනිමින්ද හිඳ ගනිමින්ද ඔවුන්ගේ පැතිවල (ඇලවෙමින්)ද අල්ලාහ්ව සිහි කරති. එමෙන්ම අහස් සහ පොළොව මැවීම ගැන ඕනෑකමින් සිතා බලති. තවද, ඔවුන්, 'අපගේ අධිපතියාණෙනි! ඔබ මෙය නිකරුණේ නොමැව්වෙහිය. (එසේනොව) ඔබ සුවිශුද්ධය. එබැවින් ගින්නෙහි දඬුවමින් අපව ආරක්ෂා කරනු මැනවැ'යි කියති.

ٱلَّذِينَ يَذْكُرُونَ ٱللَّهَ قِيَٰمًا وَقُعُودًا وَعَلَىٰ جُنُوبِهِمْ وَيَتَفَكَّرُونَ فِى خَلْقِ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ رَبَّنَا مَا خَلَقْتَ هَٰذَا بَٰطِلًا سُبْحَٰنَكَ فَقِنَا عَذَابَ ٱلنَّارِ ﴿١٩٢﴾

193. 'අපගේ අධිපතියාණෙනි!

رَبَّنَآ إِنَّكَ مَن تُدْخِلِ ٱلنَّارَ فَقَدْ

اَخۡزَيۡتَهٗ ؕ وَمَا لِلظّٰلِمِيۡنَ مِنۡ اَنۡصَارٍ ﴿۱۹۳﴾

කවරෙකු හෝ ඔබ ගින්නට ඇතුළු කරන්නේද නියතවශයෙන්ම ඔබ ඔහුව නින්දාවට පාත්‍ර කරන්නෙහිය. තවද වැරදිකරන්නන් හට උදව්කරුවන් නොමැත.'

رَبَّنَاۤ اِنَّنَا سَمِعۡنَا مُنَادِيًا يُّنَادِىۡ لِلۡاِيۡمَانِ اَنۡ اٰمِنُوۡا بِرَبِّكُمۡ فَاٰمَنَّا ۖ رَبَّنَا فَاغۡفِرۡ لَنَا ذُنُوۡبَنَا وَكَفِّرۡ عَنَّا سَيِّاٰتِنَا وَتَوَفَّنَا مَعَ الۡاَبۡرَارِ ﴿۱۹۴﴾ۚ

194. "අපගේ අධිපතියාණෙනි! 'නුඹලාගේ අධිපතියාණන් කෙරෙහි නුඹලා විශ්වාස කරනු'යි විශ්වාසය වෙතට කැඳවන්නෙකුගේ හඬට අපි සවන් දුනිමු, තවද අපි විශ්වාස කළෙමු. අපගේ අධිපතියාණෙනි! එබැවින් අපගේ පාපයන්ට අපට සමා කරනු මැනව, තවද අපගේ අයහපත් ක්‍රියා අපගෙන් ඉවත් කරනු මැනව, තවද මරණයෙහිදී අපව ධාර්මිෂ්ඨකයින් සමග එක් කරනු මැනව."

رَبَّنَا وَاٰتِنَا مَا وَعَدتَّنَا عَلٰى رُسُلِكَ وَلَا تُخۡزِنَا يَوۡمَ الۡقِيٰمَةِ ؕ اِنَّكَ لَا تُخۡلِفُ الۡمِيۡعَادَ ﴿۱۹۵﴾

195. 'අපගේ අධිපතියාණෙනි! ඔබගේ දූතයින් මගින් ඔබ අපට පොරොන්දු වූ දේ අපහට දෙනු මැනව. තවද පුනරුත්ථාන දිනයේදී අපව නින්දාවට පත් නොකරනු මැනව. නියතවශයෙන්ම ඔබගේ පොරොන්දුව ඔබ කඩ නොකරන්නෙහිය.'

فَاسۡتَجَابَ لَهُمۡ رَبُّهُمۡ اَنِّىۡ لَاۤ اُضِيۡعُ عَمَلَ عَامِلٍ مِّنۡكُمۡ مِّنۡ ذَكَرٍ اَوۡ اُنۡثٰى ۚ بَعۡضُكُمۡ مِّنۡۢ بَعۡضٍ ۚ فَالَّذِيۡنَ هَاجَرُوۡا وَاُخۡرِجُوۡا مِنۡ دِيَارِهِمۡ وَاُوۡذُوۡا فِىۡ سَبِيۡلِىۡ وَقٰتَلُوۡا وَقُتِلُوۡا لَاُكَفِّرَنَّ عَنۡهُمۡ سَيِّاٰتِهِمۡ وَلَاُدۡخِلَنَّهُمۡ جَنّٰتٍ تَجۡرِىۡ مِنۡ تَحۡتِهَا الۡاَنۡهٰرُ ۚ ثَوَابًا مِّنۡ عِنۡدِ اللّٰهِ ؕ وَاللّٰهُ عِنۡدَهٗ حُسۡنُ الثَّوَابِ ﴿۱۹۶﴾

196. එබැවින් ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන්ගේ (ප්‍රාර්ථනාවට මෙසේ පවසමින්) පිළිතුරු දුන්නේය. 'ස්ත්‍රී හෝ පුරුෂ හෝ වේවා නුඹලාගේ යම් ශ්‍රමිකයකුගේ ශ්‍රමය මම නිෂ්ඵල නොකරන්නෙමි. නුඹලා එකිනෙකාගෙන්ය. එබැවින් සංක්‍රමණය කළවුන්, තමන්ගේ නිවෙස්වලින් පිටමං කරනු ලැබුවන්, මාගේ මාර්ගයෙහි පීඩාවට ලක් කරනු ලැබුවන්, සටන් කළවුන් හා ඝාතනය කරනු ලැබුවන් යන ඔවුන්ගේ නපුර මම නිසැකවම ඔවුන් වෙතින් තුරන් කරන්නෙමි. තවද මැදින් ගලා බසිනා දිය දහරාවන්ගෙන් යුත් උද්‍යානයන්හි ඔවුන්ව ඇතුළු කරන්නෙමි. (මෙය) අල්ලාහ්ගෙන් ලැබෙන්නාවූ තිළිණයකි. තවද විශිෂ්ඨතම තිළිණය ඇත්තේ අල්ලාහ් වෙතය.'

197. අවිශ්වාසීතයින් පොළොවෙහි සැරිසැරීම නුඹලාව කිසිවිටෙකත් මුලා නොකරත්වා.

لَا يَغُرَّنَّكَ تَقَلُّبُ الَّذِيْنَ كَفَرُوْا فِي الْبِلَادِ ﴿١٩٧﴾

198. (එය) සුළු වූද (කෙටි වූද) වාසියකි. පසුව ඔවුන්ගේ වාසස්ථානය නිරය වනු ඇත. එය කෙතරම් නරක ගිමන් ස්ථානයක්ද!

مَتَاعٌ قَلِيْلٌ ثُمَّ مَأْوٰىهُمْ جَهَنَّمُ وَبِئْسَ الْمِهَادُ ﴿١٩٨﴾

199. නමුත් ඔවුන්ගේ අධිපතියාණන්ට බිය දක්වන අයහට, එතුලින් ගලා බසිනා දිය දහරාවන්ගෙන් යුත් උද්‍යානයන් ලැබෙනු ඇත. ඔවුහු එහිම වෙසෙන්නෝය. (මෙය) අල්ලාහ් ගෙන් වන සත්කාරයකි. තවද අල්ලාහ් වෙත ඇති දේ ධාර්මිෂ්ඨකයින්ට වඩා යහපත්ය.

لٰكِنِ الَّذِيْنَ اتَّقَوْا رَبَّهُمْ لَهُمْ جَنّٰتٌ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَا نُزُلًا مِّنْ عِنْدِ اللّٰهِ ۗ وَمَا عِنْدَ اللّٰهِ خَيْرٌ لِّلْاَبْرَارِ ﴿١٩٩﴾

200. තවද නියතවශයෙන්ම පුස්තකයෙහි ජනතාව අතර සමහරෙක් අල්ලාහ් කෙරෙහිද ඔබ හට පහළ කරනු ලැබූ දේ කෙරෙහිද ඔවුනට පහළ කරනු ලැබූ දේ කෙරෙහිද විශ්වාස කරන අතර, අල්ලාහ් ඉදිරියෙහි ඔවුන් යටහත් වෙති. ඔවුන් අල්ලාහ්ගේ සළකුණු අල්ප මිළකට හුවමාරු නොකරති. තමන්ගේ තිළිණ තමන්ගේ අධිපතියාණන් වෙතින් ලබන්නෝ ඔවුන්මය. නියතවශයෙන්ම අල්ලාහ් ගණන් ගැනීමේදී ඉතා සීඝ්‍රය.

وَاِنَّ مِنْ اَهْلِ الْكِتٰبِ لَمَنْ يُّؤْمِنُ بِاللّٰهِ وَمَا اُنْزِلَ اِلَيْكُمْ وَمَا اُنْزِلَ اِلَيْهِمْ خٰشِعِيْنَ لِلّٰهِ ۙ لَا يَشْتَرُوْنَ بِاٰيٰتِ اللّٰهِ ثَمَنًا قَلِيْلًا ۗ اُولٰٓئِكَ لَهُمْ اَجْرُهُمْ عِنْدَ رَبِّهِمْ ۗ اِنَّ اللّٰهَ سَرِيْعُ الْحِسَابِ ﴿٢٠٠﴾

201. එම්බල විශ්වාසීතයිනි! ස්ථිරසාර වනු, තවද ස්ථිරසාරයෙහි උසස් වීමට පරිශ්‍රමයෙහි යෙදෙනු. තවද (නුඹලාව) ආරක්ෂා කර ගනු, තවද නුඹලා සමෘධිමත් වනු පිණිස අල්ලාහ් කෙරෙහි බිය දක්වනු.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اصْبِرُوْا وَصَابِرُوْا وَرَابِطُوْا ۗ وَاتَّقُوا اللّٰهَ لَعَلَّكُمْ تُفْلِحُوْنَ ﴿٢٠١﴾




## අල් නිසා

(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا النَّاسُ اتَّقُوْا رَبَّكُمُ الَّذِىْ خَلَقَكُمْ مِّنْ نَّفْسٍ وَّاحِدَةٍ وَّخَلَقَ مِنْهَا زَوْجَهَا وَبَثَّ مِنْهُمَا رِجَالًا كَثِيْرًا وَّنِسَآءً ۚ وَاتَّقُوا اللّٰهَ الَّذِىْ تَسَآءَلُوْنَ بِهٖ وَالْاَرْحَامَ ؕ اِنَّ اللّٰهَ كَانَ عَلَيْكُمْ رَقِيْبًا ②

2. එම්බල ජනතාවෙනි! නුඹලාගේ අධිපතියාණන්ට බියවනු. ඔහු එකම ප්‍රාණයකින් නුඹලාව මැව්වේය. තවද, එයින් එයගේ සහකරු මැව්වේය. තවද එම දෙදෙනාගෙන් බොහෝ පුරුෂයින්ද ස්ත්‍රීන්ද ව්‍යාප්ත කළේය. තවද අල්ලාහ්ට බියවනු. ඔහුගේ නාමයෙන් නුඹලා එකිනෙකාට ආයාචනා කරන්නෙහුය. එමෙන්ම ඥාති සබඳකම්වලට (අදාලව විශේෂයෙන් ඔහුට බියවනු). සැබැවින්ම අල්ලාහ් නුඹලා කෙරෙහි විමසිලිමත්ය.

وَاٰتُوا الْيَتٰمٰۤى اَمْوَالَهُمْ وَلَا تَتَبَدَّلُوا الْخَبِيْثَ بِالطَّيِّبِ ۖ وَلَا تَاْكُلُوْۤا اَمْوَالَهُمْ اِلٰۤى اَمْوَالِكُمْ ؕ اِنَّهٗ كَانَ حُوْبًا كَبِيْرًا ③

03. තවද අනාථයින් හට ඔවුන්ගේ දේපළ ලබා දෙනු, තවද යහපත් දේ වෙනුවට අයහපත් දේ හුවමාරු නොකරනු. එමෙන්ම නුඹලාගේ දේපළ සමඟ ඔවුන්ගේ දේපළද ගිල නොදමනු. නියතවශයෙන්ම මෙය මහත් වූ පාපයකි.

وَاِنْ خِفْتُمْ اَلَّا تُقْسِطُوْا فِى الْيَتٰمٰى فَانْكِحُوْا مَا طَابَ لَكُمْ مِّنَ النِّسَآءِ مَثْنٰى وَثُلٰثَ وَرُبٰعَ ۚ فَاِنْ خِفْتُمْ اَلَّا تَعْدِلُوْا فَوَاحِدَةً اَوْ مَا مَلَكَتْ اَيْمَانُكُمْ ؕ ذٰلِكَ اَدْنٰۤى اَلَّا تَعُوْلُوْا ④

04. තවද (යුද්ධයකින් පසු) අනාථයින් සම්බන්ධයෙන් නුඹලා (සමාජයේ) සාධාරණව කටයුතු කිරීමට අපොහොසත් වනු ඇතැයි නුඹලා බිය වන්නේ නම්, නුඹලාගේ කැමැත්ත පරිදි අන් ස්ත්‍රීන් දෙදෙනෙකු හෝ තිදෙනෙකු හෝ සිව්දෙනෙකු හෝ විවාහ කරගනු. එහෙත් සාධාරණයෙන් කටයුතු කළ නොහැකි වේ යැයි නුඹලා බිය වන්නේ නම්, එක් අයෙකු (පමණක්) නැත්නම් නුඹලාගේ දකුණත් උරුම කරගත් අය (විවාහ කර ගනු). අසාධාරණය වැළැක්වීමට නුඹලාට ඇති සමීපතම (මග) එය වේ.

وَاٰتُوا النِّسَآءَ صَدُقٰتِهِنَّ نِحْلَةً ؕ فَاِنْ طِبْنَ لَكُمْ عَنْ شَىْءٍ مِّنْهُ نَفْسًا فَكُلُوْهُ هَنِيْٓـًٔا مَّرِیْٓـًٔا ۝۴

05. තවද ස්ත්‍රීන්ට ඔවුන්ගේ දෑවැද්ද කැමැත්තෙන් දෙනු. නමුත් ඔවුහු සිය කැමැත්තෙන්, එයින් කොටසක් නුඹලාට දෙන්නේ නම්, එය නුඹලාට ප්‍රසන්න වූත් තීරණාත්මක යහපත් වූත් දෙයක් ලෙස භුක්ති විඳිනු.

وَلَا تُؤْتُوا السُّفَهَآءَ اَمْوَالَكُمُ الَّتِىْ جَعَلَ اللّٰهُ لَكُمْ قِيٰمًا وَّارْزُقُوْهُمْ فِيْهَا وَاكْسُوْهُمْ وَقُوْلُوْا لَهُمْ قَوْلًا مَّعْرُوْفًا ۝۵

* 06. තවද අල්ලාහ් නුඹලාගේ යැපීම සඳහා සැලැස්වූ නුඹලාට අයිති වූ දේපළ හි වගකීම, ඒවා නිසියාකාරව පාලනය කළ නොහැකි දුර්වල මානසිකත්වයෙන් යුත් අයට නොපවරනු. එමෙන්ම ඔවුනට යහපත් අයුරින් ආහාර සපයනු. තවද ඔවුන්ට අන්දවනු. තවද ඔවුනට කාරුණිකව කතා කරනු.

وَابْتَلُوا الْيَتٰمٰى حَتّٰٓى اِذَا بَلَغُوا النِّكَاحَ ۚ فَاِنْ اٰنَسْتُمْ مِّنْهُمْ رُشْدًا فَادْفَعُوْٓا اِلَيْهِمْ اَمْوَالَهُمْ ۚ وَلَا تَاْكُلُوْهَآ اِسْرَافًا وَّبِدَارًا اَنْ يَّكْبَرُوْا ؕ وَمَنْ كَانَ غَنِيًّا فَلْيَسْتَعْفِفْ ۚ وَمَنْ كَانَ فَقِيْرًا فَلْيَاْكُلْ بِالْمَعْرُوْفِ ؕ فَاِذَا دَفَعْتُمْ اِلَيْهِمْ اَمْوَالَهُمْ فَاَشْهِدُوْا عَلَيْهِمْ ؕ وَكَفٰى بِاللّٰهِ حَسِيْبًا ۝۶

07. තවද අනාථයින් විවාහ වියට එළඹෙන තුරු, ඔවුන්(ගේ අවබෝධය) පරීක්ෂා කරනු. පසුව නුඹලා ඔවුන් තුළ මනා තීරණයක් ගැනීමේ හැකියාවක් දකින්නේ නම්, ඔවුන්ගේ දේපළ ඔවුන් වෙත භාර දෙනු. ඔවුන් වැඩෙන්නට පෙර නාස්තිකාරව සහ කඩිනමින් එය ගිල නොදමනු. තවද කවුරුන් හෝ ධනවතෙකු නම් ඔහු වැළකී සිටිය යුතුය. එහෙත් කවුරුන් හෝ දුගියෙකු නම් ඔහු සාධාරණ ලෙස (එයින්) අනුභව කළ යුතුය. තවද නුඹලා ඔවුන්ගේ දේපළ ඔවුන් වෙත ලබාදෙන විටදී ඔවුන් ඉදිරියට සාක්ෂි කැඳවනු. තවද ගණන් ගන්නෙකු ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය.

لِلرِّجَالِ نَصِيْبٌ مِّمَّا تَرَكَ الْوَالِدٰنِ

08. දෙමව්පියන් හා සමීප ඥාතීන් හැරගිය දැයින් කොටසක් පිරිමින්ට

* සටහන. 6: මෙහිදී මුළු මහත් සමාජයම එක්ව අමතනු ලැබ ඇති අතර මෙහිදී සැළකිල්ලට ගෙන ඇති දේපළ ජාතික දේපළ නොවන අතර යුධ සමයේදී සීඝ්‍රයෙන් වැඩිවන අනාථයින්ට අයත් ඒවාය. පැහැදිලිවම ජාතික දේපළින් සැළකිය යුතු කොටසක් මෙවැනි විශේෂ අවස්ථාවලදී සම්බන්ධ විය හැක. ජාතියක් වශයෙන් ඒකරාශිව එවැනි දේපළ රැකබලා නොගෙන, තම දේපල නුවණක්කාර ලෙස හසුරුවීමට පළපුරුද්ද හා හැකියාව නොමැති දරුවන්ගේ භාරය යටතේ එය මුළුමනින්ම හරින්නේ නම්, මෙය මුළු මහත් ජාතික ආර්ථිකයටම හානිකර බලපෑමක් විය හැක. මෙම ප්‍රශ්නය විසඳීම සඳහා ජාතියක් එක්ව අමතනු ලැබ ඇති අතර ඔවුන්ට අයිති වූ ලෙස ප්‍රශ්නයට තුඩු දුන් දේපළ මනාව රැකීමේ වගකීම ජාතියට භාර කර ඇත. කෙසේ වෙතත් එවැනි අනාථයින්ට ඔවුන්ගේ උරුමයද අයිතියද ස්ථිරවම අහිමි කරනු ඇතැයි යන්න මෙහි තේරුම නොවේ. මෙයට පසුව එන වාක්‍යයද, 11 වෙනි වාක්‍යයද මෙම වාක්‍යයෙහි සත්‍ය වැදගත්කම මනාව පැහැදිලි කරයි.

ඇත. තවද දෙමව්පියන් හා සමීප ඥාතීන් හැරගිය දෑයින් කොටසක් ස්ත්‍රීන්ටද ඇත. එය සුළු හෝ විශාල ප්‍රමාණයක් වුවද මෙය (අල්ලාහ් විසින්) නියම කරනු ලැබූ කොටසකි.

وَالْأَقْرَبُونَ وَلِلنِّسَاءِ نَصِيبٌ مِمَّا تَرَكَ الْوَالِدَانِ وَالْأَقْرَبُونَ مِمَّا قَلَّ مِنْهُ أَوْ كَثُرَ ۚ نَصِيبًا مَفْرُوضًا ٨

09. තවද (උරුමය) බෙදා වෙන් කිරීමේදී (අනෙක්) ඥාතීන්ද අනාථයන්ද දුගීන්ද පැමිණ සිටියේ නම්, ඔවුන්ටත් එයින් (යමක්) දෙනු. තවද ඔවුන්ට කාරුණික වදන් පවසනු.

وَإِذَا حَضَرَ الْقِسْمَةَ أُولُو الْقُرْبَىٰ وَالْيَتَامَىٰ وَالْمَسَاكِينُ فَارْزُقُوهُمْ مِنْهُ وَقُولُوا لَهُمْ قَوْلًا مَعْرُوفًا ٩

10. තවද තමන්ගෙන් පසු බෙලහීන දරුවන් හැරයන්නේ නම්, ඒ අය වෙනුවෙන් ඕනෑකමින් තැවෙන්නන් බිය වෙත්වා. එබැවින්, ඔවුන් (අනාථයන් පිළිබඳව) අල්ලාහ්ට බිය වෙත්වා. තවද ඔවුන් නිවැරදි වදන් පවසත්වා.

وَلْيَخْشَ الَّذِينَ لَوْ تَرَكُوا مِنْ خَلْفِهِمْ ذُرِّيَّةً ضِعَافًا خَافُوا عَلَيْهِمْ فَلْيَتَّقُوا اللَّهَ وَلْيَقُولُوا قَوْلًا سَدِيدًا ١٠

11. නියතවශයෙන්ම අනාථයින්ගේ දේපළ අසාධාරණ ලෙස ගිල දමන්නන්, ඔවුන්ගේ කුස තුළට ගින්නම පුරවා ගන්නෝය. තවද ඔවුහු ඇවිලෙන ගිනි ජාලාවෙහි පිළිස්සෙනු ඇත.

إِنَّ الَّذِينَ يَأْكُلُونَ أَمْوَالَ الْيَتَامَىٰ ظُلْمًا إِنَّمَا يَأْكُلُونَ فِي بُطُونِهِمْ نَارًا ۖ وَسَيَصْلَوْنَ سَعِيرًا ١١ ع

12. අල්ලාහ් නුඹලාගේ දරුවන් සම්බන්ධයෙන් නුඹලාට අණ කරන්නේය. එක් පිරිමියෙකුට ස්ත්‍රීන් දෙදෙනෙකුගේ කොටසට සමානව හිමි විය යුතුය. නමුත් (ගණනින්) දෙකකට වඩා ස්ත්‍රීන් (පමණක්) සිටියේ නම්, (මියගිය තැනැත්තා) හැර ගිය දෑයින් තුනෙන් දෙකක් ඔවුනට හිමි විය යුතුය. එක් කෙනෙකු සිටින්නේ නම්, ඇයට හරි අඩක් හිමිවේ. තවද ඔහුට (මියගිය තැනැත්තාට) දරුවන් සිටියේ නම්, ඔහුගේ මව්පියන්ගෙන් එක් අයෙකුට උරුමයෙන් හයෙන් කොටසක් බැගින්

يُوصِيكُمُ اللَّهُ فِي أَوْلَادِكُمْ ۖ لِلذَّكَرِ مِثْلُ حَظِّ الْأُنْثَيَيْنِ ۚ فَإِنْ كُنَّ نِسَاءً فَوْقَ اثْنَتَيْنِ فَلَهُنَّ ثُلُثَا مَا تَرَكَ ۖ وَإِنْ كَانَتْ وَاحِدَةً فَلَهَا النِّصْفُ ۚ وَلِأَبَوَيْهِ لِكُلِّ وَاحِدٍ مِنْهُمَا السُّدُسُ مِمَّا تَرَكَ إِنْ كَانَ لَهُ وَلَدٌ ۚ فَإِنْ لَمْ يَكُنْ لَهُ وَلَدٌ

وَّوَرِثَهٗۤ اَبَوٰهُ فَلِاُمِّهِ الثُّلُثُ ۚ فَاِنْ كَانَ
لَهٗۤ اِخْوَةٌ فَلِاُمِّهِ السُّدُسُ مِنْۢ بَعْدِ وَصِيَّةٍ
يُّوْصِىْ بِهَاۤ اَوْ دَيْنٍ ؕ اٰبَآؤُكُمْ
وَاَبْنَآؤُكُمْ لَا تَدْرُوْنَ اَيُّهُمْ اَقْرَبُ
لَكُمْ نَفْعًا ؕ فَرِيْضَةً مِّنَ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ
كَانَ عَلِيْمًا حَكِيْمًا ﴿١١﴾

හිමි විය යුතුය. නමුත් ඔහුට දරුවන් නොමැති නම් ඔහුගේ දෙමව්පියන් ඔහුගේ උරුමක්කාරයින් වන්නෝය, එවිට ඔහුගේ මවට තුනෙන් එක් කොටසක් වේ. තවද ඔහුට සහෝදර සහෝදරියන් සිටින්නේ නම් ඔහුගේ මවට හයෙන් එක් කොටසක් වේ. මෙය ඔහු ප්‍රකාශ කර ඇති ඔහුගේ අවසන් කැමැත්ත, නැත්නම් ණය යනාදීන් (ගෙවීමෙන්) පසුවය. නුඹලාගේ පියවරුන් සහ නුඹලාගේ දරුවන් අතරින් වල ප්‍රයෝජන ලැබීමට නුඹලාට ඉතා සමීප කවුරුන් දැයි නුඹලා නොදන්නෙහුය. (මෙම කොටස්) නියම කිරීම අල්ලාහ් වෙතින්ය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥා සම්පන්නය.

وَلَكُمْ نِصْفُ مَا تَرَكَ اَزْوَاجُكُمْ اِنْ
لَّمْ يَكُنْ لَّهُنَّ وَلَدٌ ۚ فَاِنْ كَانَ لَهُنَّ وَلَدٌ
فَلَكُمُ الرُّبُعُ مِمَّا تَرَكْنَ مِنْۢ بَعْدِ وَصِيَّةٍ
يُّوْصِيْنَ بِهَاۤ اَوْ دَيْنٍ ؕ وَلَهُنَّ الرُّبُعُ مِمَّا
تَرَكْتُمْ اِنْ لَّمْ يَكُنْ لَّكُمْ وَلَدٌ ۚ فَاِنْ كَانَ
لَكُمْ وَلَدٌ فَلَهُنَّ الثُّمُنُ مِمَّا تَرَكْتُمْ مِّنْۢ
بَعْدِ وَصِيَّةٍ تُوْصُوْنَ بِهَاۤ اَوْ دَيْنٍ ؕ وَاِنْ
كَانَ رَجُلٌ يُّوْرَثُ كَلٰلَةً اَوِ امْرَاَةٌ وَّلَهٗۤ
اَخٌ اَوْ اُخْتٌ فَلِكُلِّ وَاحِدٍ مِّنْهُمَا
السُّدُسُ ۚ فَاِنْ كَانُوْۤا اَكْثَرَ مِنْ ذٰلِكَ
فَهُمْ شُرَكَآءُ فِى الثُّلُثِ مِنْۢ بَعْدِ وَصِيَّةٍ
يُّوْصٰى بِهَاۤ اَوْ دَيْنٍ ۙ غَيْرَ مُضَآرٍّ ۚ

13. තවද ඔවුනට දරුවන් නොමැති නම්, නුඹලාගේ භාර්යයාවන් හැර ගිය දැයින්, අඩක් නුඹලාට හිමිවේ. ඔවුනට දරුවන් සිටියේ නම් ඔවුන් හැර ගිය දැයින් නුඹලාට හතරෙන් එකක් හිමිවේ, මෙය ඔවුන් ප්‍රකාශ කර ඇති ඔවුන්ගේ අවසන් කැමැත්ත ද, නැත්නම් ණය යනාදීන්ද (ගෙවීමෙන්) පසුවය. නුඹලාට දරුවන් නොමැති නම්, නුඹලා හැර යන දැයින් ඔවුනට සතරෙන් එකක් හිමිවේ. එහෙත් නුඹලාට දරුවන් සිටියේ නම් නුඹලා හැර යන දැයින් ඔවුනට අටෙන් එකක් හිමිවේ. මෙය නුඹලා ප්‍රකාශ කර ඇති නුඹලාගේ අවසන් කැමැත්ත ද, නැත්නම් ණය යනාදීන්ද (ගෙවීමෙන්) පසුවය. තවද පුරුෂයෙකුගේ හෝ ස්ත්‍රියකගේ උරුමය බෙදනු ලබන්නේ නම් තවද ඔහුට (හෝ ඇයට) දෙමාපියන් හෝ දරුවන් නොමැති විටකදී තවද ඔහුට (හෝ ඇයට) සහෝදරයෙකු හෝ සහෝදරියකු සිටින්නේ නම් ඔවුන් දෙදෙනාගෙන් එක් අයෙකුට හයෙන් එකක් හිමිවේ. නමුත් ඔවුන් ඊට වැඩිගණනක් සිටින්නේ නම් ඔවුහු තුනෙන් එකකට (සමාන) කොටස්කරුවන් වන්නෝය, මෙය ප්‍රකාශ කර ඇති අවසන් කැමැත්ත ද නැත්නම් කිසිවෙකුටත් දුක්පීඩාවක්

وَصِيَّةً مِّنَ اللّٰهِ ۗ وَاللّٰهُ عَلِيمٌ حَلِيمٌ ﴿١٢﴾

(සිදුකිරීමේ අදහසින්) තොරව ණය යනාදීන්ද (ගෙවීමෙන්) පසුවය. (මෙය) අල්ලාහ්ගෙන් වන නියෝගයකි. අල්ලාහ් සියල්ල දන්නාය. ඉවසිලිවන්තය.

تِلْكَ حُدُودُ اللّٰهِ ۚ وَمَن يُطِعِ اللّٰهَ وَرَسُولَهُ يُدْخِلْهُ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا ۚ وَذَٰلِكَ الْفَوْزُ الْعَظِيمُ ﴿١٣﴾

14. අල්ලාහ් විසින් (පනවා ඇති) සීමාවන් මේවාය. කවරෙකු හෝ අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද අවනත වන්නේ නම්, ඔහුව එතුලින් ගලා බස්නා දියදහරාවලින් යුත් උද්‍යානයන්හි ඇතුළු කිරීමට ඔහු සලස්වන්නේය. ඔවුහු එහිම වෙසෙන්නෝය. තවද එය අති මහත් ජයග්‍රහණයකි.

وَمَن يَعْصِ اللّٰهَ وَرَسُولَهُ وَيَتَعَدَّ حُدُودَهُ يُدْخِلْهُ نَارًا خَالِدًا فِيهَا وَلَهُ عَذَابٌ مُّهِينٌ ﴿١٤﴾ ع

15. තවද කවුරුන් හෝ අල්ලාහ්ටද, ඔහුගේ දූතයාණන්ටද අවනත නොවී, ඔහුගේ සීමාවන් උල්ලංඝණය කරන්නේද, ඔහුව ගින්න තුළට ඔහු ඇතුළු කිරීමට සලස්වන්නේය. ඔහු එහිම වෙසෙන්නේය. ඔහුට නින්දිත වූ දඬුවමක්ද ලැබෙනු ඇත.

وَاللَّاتِي يَأْتِينَ الْفَاحِشَةَ مِن نِّسَائِكُمْ فَاسْتَشْهِدُوا عَلَيْهِنَّ أَرْبَعَةً مِّنكُمْ ۖ فَإِن شَهِدُوا فَأَمْسِكُوهُنَّ فِي الْبُيُوتِ حَتَّىٰ يَتَوَفَّاهُنَّ الْمَوْتُ أَوْ يَجْعَلَ اللّٰهُ لَهُنَّ سَبِيلًا ﴿١٥﴾

16. තවද නුඹලාගේ ස්ත්‍රීන්ගෙන් කවුරුන් හෝ දුරාචාරයට වරදකරු වූයේ නම් ඔවුන්ට එරෙහිව සාක්ෂීන් සතරක් නුඹලා අතරෙන් කැඳවනු. තවද ඔවුන් සාක්ෂි දැරුවේ නම්, පසුව ඔවුනට මරණය පැමිණෙන තෙක් හෝ අල්ලාහ් ඔවුනට කිසියම් මාර්ගයක් විවෘත කරන තෙක් හෝ නුඹලා ඔවුන්ව නිවාසයන්හි රඳවා තබනු.

وَاللَّذَانِ يَأْتِيَانِهَا مِنكُمْ فَآذُوهُمَا ۖ فَإِن تَابَا وَأَصْلَحَا فَأَعْرِضُوا عَنْهُمَا ۗ إِنَّ اللّٰهَ كَانَ تَوَّابًا رَّحِيمًا ﴿١٦﴾

17. තවද නුඹලා අතරෙන් පිරිමින් දෙදෙනෙකු එම වරදකරු වූයේ නම්, ඔවුන් දෙදෙනාටම දඬුවම් කරනු. තවද ඔවුන් පසුතැවිලි වෙමින්, නිවැරදි කර ගන්නේ නම්, එවිට ඔවුන්ව අත් හරිනු. නියතවශයෙන්ම අල්ලාහ් (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය.(තවද) දයාබරය.

18. ඇත්තෙන්ම, නොදැනුවත්ව නපුරක් කර, පසුව වහාම පසුතැවිලි වන්නන්ගේ පසුතැවිලිවීම පමණක් භාරගැනීම අල්ලාහ් කෙරෙහිය. අල්ලාහ් දයාවෙන් යුතුව හැරෙන්නේ ඔවුන් වෙතටය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥා සම්පන්නය.

إِنَّمَا التَّوْبَةُ عَلَى اللَّهِ لِلَّذِينَ يَعْمَلُونَ السُّوءَ بِجَهَالَةٍ ثُمَّ يَتُوبُونَ مِن قَرِيبٍ فَأُولَٰئِكَ يَتُوبُ اللَّهُ عَلَيْهِمْ ۗ وَكَانَ اللَّهُ عَلِيمًا حَكِيمًا ﴿١٨﴾

19. කවුරුන් හෝ (දිගටම) නපුරු ක්‍රියාවෙහි යෙදී සිට, ඔවුන්ගෙන් කෙනෙකුට මරණාසන්න වූ විට 'මම දැන් පසුතැවිලි වන්නෙමි'යි පවසන අයගේද, අවිශ්වාසිතයින් ලෙස මිය යන අයගේද පශ්චාත්තාපවීම (භාරගැනීමක්) නොමැත. අප වේදනීය දඬුවමක් පිළියෙල කර ඇත්තේ මෙවැන්නන් හටය.

وَلَيْسَتِ التَّوْبَةُ لِلَّذِينَ يَعْمَلُونَ السَّيِّئَاتِ ۚ حَتَّىٰ إِذَا حَضَرَ أَحَدَهُمُ الْمَوْتُ قَالَ إِنِّي تُبْتُ الْآنَ وَلَا الَّذِينَ يَمُوتُونَ وَهُمْ كُفَّارٌ ۚ أُولَٰئِكَ أَعْتَدْنَا لَهُمْ عَذَابًا أَلِيمًا ﴿١٩﴾

20. එම්බල විශ්වාසිතයිනි! ස්ත්‍රීන්ගේ කැමැත්තට එරෙහිව ඔවුන්ව උරුම කර ගැනීම නුඹලාට නීත්‍යානුකූල නොවන්නේය. තවද ඔවුන් පරදාර සේවනයේ වරදට හසුවූයේ නම් මිස නුඹලා ඔවුනට දුන් දැයින් කොටසක් ආපසු ගැනීමේ අදහසින් ඔවුන්ව වැරදි ලෙස රඳවා නොගනු. තවද නුඹලා ඔවුන් සමග කරුණාවෙන් යුතුව හැසිරෙනු. තවද නුඹලා ඔවුන්ව අප්‍රිය කරන්නේ නම්, නුඹලා අප්‍රිය කරන දැයහි අල්ලාහ් බොහෝ යහපත තබන්නට ඉඩ ඇත.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا يَحِلُّ لَكُمْ أَن تَرِثُوا النِّسَاءَ كَرْهًا ۖ وَلَا تَعْضُلُوهُنَّ لِتَذْهَبُوا بِبَعْضِ مَا آتَيْتُمُوهُنَّ إِلَّا أَن يَأْتِينَ بِفَاحِشَةٍ مُّبَيِّنَةٍ ۚ وَعَاشِرُوهُنَّ بِالْمَعْرُوفِ ۚ فَإِن كَرِهْتُمُوهُنَّ فَعَسَىٰ أَن تَكْرَهُوا شَيْئًا وَيَجْعَلَ اللَّهُ فِيهِ خَيْرًا كَثِيرًا ﴿٢٠﴾

21. තවද නුඹලා එක් භාර්යයාවකගේ ස්ථානයට තවත් කෙනෙකු ගැනීමට කැමැති වන්නේ නම්, තවද නුඹලා ඔවුන්ගෙන් අයෙකුට වස්තු සම්භාරයක් දී තිබුණද, එයින් අල්පයක්වත් නොගනු. බොරු ගොතමින් හා ප්‍රකට වූ පාපයෙන් නුඹලා එය ලබා ගන්නෙහුද?

وَإِنْ أَرَدتُّمُ اسْتِبْدَالَ زَوْجٍ مَّكَانَ زَوْجٍ وَآتَيْتُمْ إِحْدَاهُنَّ قِنطَارًا فَلَا تَأْخُذُوا مِنْهُ شَيْئًا ۚ أَتَأْخُذُونَهُ بُهْتَانًا وَإِثْمًا مُّبِينًا ﴿٢١﴾

22. තවද, නුඹලාගෙන් එක් කෙනෙකු අනෙකෙකු සමඟ හවුල්ව සිටියදීත්, තවද ඔවුන් (ස්ත්‍රීන්) නුඹලාගෙන් ස්ථිර ප්‍රතිඥාවක් ලබා සිටියදීත්, නුඹලා එය කෙසේ ගන්නෙහුද?

وَكَيْفَ تَأْخُذُونَهُۥ وَقَدْ أَفْضَىٰ بَعْضُكُمْ إِلَىٰ بَعْضٍ وَأَخَذْنَ مِنكُم مِّيثَٰقًا غَلِيظًا ﴿٢٢﴾

23. තවද නුඹලාගේ පියවරුන් විවාහ කරගත් ස්ත්‍රීන් කිසිවෙකු නුඹලා විවාහ කර නොගනු. කලින් සිදුවූ දේ හැරෙන්නට. එය දූෂිත වූද පිළිකුල් වූද දෙයකි. තවද නපුරු මගකි.

وَلَا تَنكِحُوا۟ مَا نَكَحَ ءَابَآؤُكُم مِّنَ ٱلنِّسَآءِ إِلَّا مَا قَدْ سَلَفَ ۚ إِنَّهُۥ كَانَ فَٰحِشَةً وَمَقْتًا وَسَآءَ سَبِيلًا ﴿٢٣﴾

24. නුඹලාගේ මව්වරුන්ද, නුඹලාගේ දියණියන්ද, නුඹලාගේ සොහොයුරියන්ද, නුඹලාගේ පියාගේ සොහොයුරියන්ද, නුඹලාගේ මවගේ සොහොයුරියන්ද, නුඹලාගේ සොහොයුරාගේ දියණියන්ද, නුඹලාගේ සොහොයුරියගේ දියණියන්ද, නුඹලාට කිරි පෙවූ නුඹලාගේ (කිරි) මව්වරුන්ද, නුඹලා සමඟ වැඩුන සොහොයුරියන්ද, නුඹලාගේ භාර්යයාවන්ගේ මව්වරුන්ද, නුඹලා සංවාසයේ යෙදුනු නුඹලාගේ භාරකාරත්වයෙහි සිටින භාර්යයාවන්ගේ සුළු දියණියන්ද යන අය නුඹලාට තහනම් කරන ලද්දවුන්ය. එහෙත් නුඹලා ඔවුන් සමඟ සංවාසයේ නොයෙදුනේ නම්, නුඹලාට කිසිඳු පවක් නොමැත. තවද නුඹලාගේ ඇකයෙන්වූ නුඹලාගේ පුතුන්ගේ භාර්යයාවන්ද තවද නුඹලාට එකවර සහෝදරියන් දෙදෙනෙකු (විවාහකර) ගැනීමද (තහනම් කරන ලදී.) කලින් සිදුවූ දේ හැරෙන්නට. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

حُرِّمَتْ عَلَيْكُمْ أُمَّهَٰتُكُمْ وَبَنَاتُكُمْ وَأَخَوَٰتُكُمْ وَعَمَّٰتُكُمْ وَخَٰلَٰتُكُمْ وَبَنَاتُ ٱلْأَخِ وَبَنَاتُ ٱلْأُخْتِ وَأُمَّهَٰتُكُمُ ٱلَّٰتِىٓ أَرْضَعْنَكُمْ وَأَخَوَٰتُكُم مِّنَ ٱلرَّضَٰعَةِ وَأُمَّهَٰتُ نِسَآئِكُمْ وَرَبَٰٓئِبُكُمُ ٱلَّٰتِى فِى حُجُورِكُم مِّن نِّسَآئِكُمُ ٱلَّٰتِى دَخَلْتُم بِهِنَّ فَإِن لَّمْ تَكُونُوا۟ دَخَلْتُم بِهِنَّ فَلَا جُنَاحَ عَلَيْكُمْ وَحَلَٰٓئِلُ أَبْنَآئِكُمُ ٱلَّذِينَ مِنْ أَصْلَٰبِكُمْ وَأَن تَجْمَعُوا۟ بَيْنَ ٱلْأُخْتَيْنِ إِلَّا مَا قَدْ سَلَفَ ۗ إِنَّ ٱللَّهَ كَانَ غَفُورًا رَّحِيمًا ﴿٢٤﴾

5 කොටස

25. තවද නුඹලාගේ දකුණත් හිමි කරගත් අය හැර විවාහක ස්ත්‍රීන් (නුඹලාට තහනම් කරන ලද්දන්ය). මෙය නුඹලාට අල්ලාහ් නියම කර ඇත. තවද මේ අය හැර, නුඹලාට අනුමත කරන ලද අය නම්, නුඹලා පරදාර සේවනයෙන් තොරව, නුඹලාගේ වස්තුව මගින් නියමාකාරව (ඔවුන්ව) විවාහ කර ලබා ගන්නා අය වේ. තවද නුඹලා ඔවුන්ගෙන් ඵල ප්‍රයෝජන ලබාගත් බැවින් ඔවුන්ගේ දැවැද්ද (මහර්) නියම කළ පරිදි, ඔවුනට දිය යුතුයි. (දැවැද්ද) නියම කළ පසු, නුඹලා අතර අන්‍යෝන්‍යව එකඟ වන කිසියම් දෙයක් කෙරෙහි නුඹලාට පවක් නොමැත. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නය.

وَّالْمُحْصَنٰتُ مِنَ النِّسَآءِ اِلَّا مَا مَلَكَتْ اَيْمَانُكُمْ ۚ كِتٰبَ اللّٰهِ عَلَيْكُمْ ۚ وَاُحِلَّ لَكُمْ مَّا وَرَآءَ ذٰلِكُمْ اَنْ تَبْتَغُوْا بِاَمْوَالِكُمْ مُّحْصِنِيْنَ غَيْرَ مُسٰفِحِيْنَ ؕ فَمَا اسْتَمْتَعْتُمْ بِهٖ مِنْهُنَّ فَاٰتُوْهُنَّ اُجُوْرَهُنَّ فَرِيْضَةً ؕ وَلَا جُنَاحَ عَلَيْكُمْ فِيْمَا تَرٰضَيْتُمْ بِهٖ مِنْۢ بَعْدِ الْفَرِيْضَةِ ؕ اِنَّ اللّٰهَ كَانَ عَلِيْمًا حَكِيْمًا ﴿٢٥﴾

26. තවද නුඹලාගෙන් කවරෙකුට හෝ නිදහස්, විශ්වාසිත ස්ත්‍රීන් විවාහ කර ගැනීමට වත්කමක් නොමැති නම්, නුඹලාගේ දකුණත් හිමිකරගත් කෙනෙකු, එනම් නුඹලාගේ විශ්වාසිත මෙහෙකාරියන්, ඔහු විවාහ කර ගනිත්වා. තවද අල්ලාහ් නුඹලාගේ විශ්වාසය ඉතා හොඳින් දන්නේය. නුඹලා (සියල්ල) එකිනෙකාගෙන්ය. එබැවින් ඔවුන්ව ඔවුන්ගේ භාරකරුවන්ගේ අවසරය ඇතිව, විවාහ කර ගනු. ඔවුන් නිර්මලභාවයෙන් ද, පරදාර සේවනයෙන් තොරව ද, රහසිගත අනියම් සම්බන්ධකම් නොපවත්වමින් ද, සිටින විටකදී නුඹලා ඔවුන්ගේ දැවැද්ද (මහර්) සාධාරණ ලෙස ඔවුනට ලබාදෙනු. තවද ඔවුන් විවාහයෙන් පසුව ඔවුන් දුරාචාරයෙහි යෙදුනේ නම්, නිදහස් ස්ත්‍රීන්ට නියම කර ඇති දඬුවමින් අඩක් ඔවුන් ලබනු ඇත. මෙය වනාහි නුඹලාගෙන් පවක් කරනු ඇතැයි බිය වන තැනැත්තා සඳහාය. තවද නුඹලා ඉවසිලිවන්ත වන්නේ නම් එය නුඹලාට වඩා යහපත්ය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَمَنْ لَّمْ يَسْتَطِعْ مِنْكُمْ طَوْلًا اَنْ يَّنْكِحَ الْمُحْصَنٰتِ الْمُؤْمِنٰتِ فَمِنْ مَّا مَلَكَتْ اَيْمَانُكُمْ مِّنْ فَتَيٰتِكُمُ الْمُؤْمِنٰتِ ؕ وَاللّٰهُ اَعْلَمُ بِاِيْمَانِكُمْ ؕ بَعْضُكُمْ مِّنْۢ بَعْضٍ ۚ فَانْكِحُوْهُنَّ بِاِذْنِ اَهْلِهِنَّ وَاٰتُوْهُنَّ اُجُوْرَهُنَّ بِالْمَعْرُوْفِ مُحْصَنٰتٍ غَيْرَ مُسٰفِحٰتٍ وَّلَا مُتَّخِذٰتِ اَخْدَانٍ ۚ فَاِذَآ اُحْصِنَّ فَاِنْ اَتَيْنَ بِفَاحِشَةٍ فَعَلَيْهِنَّ نِصْفُ مَا عَلَى الْمُحْصَنٰتِ مِنَ الْعَذَابِ ؕ ذٰلِكَ لِمَنْ خَشِىَ الْعَنَتَ مِنْكُمْ ؕ وَاَنْ تَصْبِرُوْا خَيْرٌ لَّكُمْ ؕ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٢٦﴾

27. නුඹලාට පෙර සිටිය අයගේ පිළිවෙත් නුඹලාට පැහැදිලි කර දීමටද, එය වෙත නුඹලාව යොමු කිරීමටද, තවද දයාවෙන් යුතුව නුඹලා වෙතට හැරෙන්නටද, අල්ලාහ් ප්‍රිය කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

يُرِيْدُ اللّٰهُ لِيُبَيِّنَ لَكُمْ وَيَهْدِيَكُمْ سُنَنَ الَّذِيْنَ مِنْ قَبْلِكُمْ وَيَتُوْبَ عَلَيْكُمْ ؕ وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ﴿٢٧﴾

28. තවද දයාවෙන් යුතුව නුඹලා වෙතට හැරෙන්නට අල්ලාහ් කැමැති වන්නේය, නමුත් (තමන්ගේ) පහත් ආශාවන් අනුගමනය කරන ඔවුන්, නුඹලා අයාලෙහි බොහෝ දුර යා යුතු යැයි කැමැති වන්නෙහුය.

وَاللّٰهُ يُرِيْدُ اَنْ يَّتُوْبَ عَلَيْكُمْ ۫ وَيُرِيْدُ الَّذِيْنَ يَتَّبِعُوْنَ الشَّهَوٰتِ اَنْ تَمِيْلُوْا مَيْلًا عَظِيْمًا ﴿٢٨﴾

29. නුඹලාගේ බර සැහැල්ලු කිරීමට අල්ලාහ් කැමැති වන්නේය. මන්ද මිනිසා මවන ලද්දේ බෙලහිනයෙකු ලෙසය.

يُرِيْدُ اللّٰهُ اَنْ يُّخَفِّفَ عَنْكُمْ ۚ وَخُلِقَ الْاِنْسَانُ ضَعِيْفًا ﴿٢٩﴾

30. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අන්‍යොන්‍ය වශයෙන් එකඟවූ වෙළඳාමෙන් (උපයා ගැනීමක්) මිස නුඹලාගේ දේපළ නුඹලා අතර අනීත්‍යානුකුල ලෙස ගිල නොදමනු. තවද නුඹලා, නුඹලාවම ඝාතනය නොකරනු. නියතවශයෙන්ම අල්ලාහ් නුඹලා කෙරෙහි දයාබරය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَاْكُلُوْۤا اَمْوَالَكُمْ بَيْنَكُمْ بِالْبَاطِلِ اِلَّاۤ اَنْ تَكُوْنَ تِجَارَةً عَنْ تَرَاضٍ مِّنْكُمْ ۫ وَلَا تَقْتُلُوْۤا اَنْفُسَكُمْ ؕ اِنَّ اللّٰهَ كَانَ بِكُمْ رَحِيْمًا ﴿٣٠﴾

31. තවද කවුරුන් හෝ සීමාව ඉක්මවමින්ද, අසාධාරණයෙන්ද එසේ කරන්නේ නම්, අපි ඔහුව ගින්නෙහි ඇද දමන්නෙමු තවද එය අල්ලාහ්ට ඉතා පහසුය.

وَمَنْ يَّفْعَلْ ذٰلِكَ عُدْوَانًا وَّظُلْمًا فَسَوْفَ نُصْلِيْهِ نَارًا ؕ وَكَانَ ذٰلِكَ عَلَى اللّٰهِ يَسِيْرًا ﴿٣١﴾

32. නුඹලාට තහනම් කරන ලද, ඉතා බරපතල වූ දෑයින් නුඹලා වැළකී සිටින්නේ නම්, අපි නුඹලාගේ (සුළු) වැරදි නුඹලාගෙන් ඉවත් කර අතිමහත් ගෞරවාන්විත ස්ථානයකට පිවිසීමට සලස්වන්නෙමු.

اِنْ تَجْتَنِبُوْا كَبَآئِرَ مَا تُنْهَوْنَ عَنْهُ نُكَفِّرْ عَنْكُمْ سَيِّاٰتِكُمْ وَنُدْخِلْكُمْ مُّدْخَلًا كَرِيْمًا ﴿٣٢﴾

33. තවද අල්ලාහ් නුඹලාගෙන් සමහරකුට අන් අයට වඩා විශිෂ්ඨත්වය ලබා දීම ගැන නුඹලා

وَلَا تَتَمَنَّوْا مَا فَضَّلَ اللّٰهُ بِهٖ بَعْضَكُمْ عَلٰى

بَعْضٍ ۚ لِلرِّجَالِ نَصِيبٌ مِّمَّا اكْتَسَبُوا ۚ وَلِلنِّسَاءِ نَصِيبٌ مِّمَّا اكْتَسَبْنَ ۚ وَسْـَٔلُوا اللَّهَ مِن فَضْلِهِ ۚ إِنَّ اللَّهَ كَانَ بِكُلِّ شَيْءٍ عَلِيمًا ﴿٣٢﴾

ගිජු නොවනු. පුරුෂයින්ට ඔවුන් ඉපැයූ දැයින් කොටසක් ලැබෙනු ඇත. තවද ස්ත්‍රීන්ට ඔවුන් ඉපැයූ දැයින් කොටසක් ලැබෙනු ඇත. තවද අල්ලාහ්ගෙන්, ඔහුගේ වරප්‍රසාදය යදිනු. නියතවශයෙන්ම අල්ලාහ් සියලු දැයෙහි පරිපූර්ණ දැනුම ඇත්තාය.

وَلِكُلٍّ جَعَلْنَا مَوَالِيَ مِمَّا تَرَكَ الْوَالِدَانِ وَالْأَقْرَبُونَ ۚ وَالَّذِينَ عَقَدَتْ أَيْمَانُكُمْ فَآتُوهُمْ نَصِيبَهُمْ ۚ إِنَّ اللَّهَ كَانَ عَلَىٰ كُلِّ شَيْءٍ شَهِيدًا ﴿٣٤﴾ ع

34. තවද අපි සෑම කෙනෙකුටම දෙමාපියන් සහ ඥාතීන් හැර යන දැයට උරුමක්කාරයින් පත් කර ඇත්තෙමු. (එසේම) නුඹලාගේ ප්‍රතිඥාවන් ගිවිසුමක් මගින් ස්ථිර කරගත් අයට ද වේ. එබැවින් ඔවුන්ගේ කොටස් ඔවුනට දෙනු. නියතවශයෙන්ම අල්ලාහ් සියලු දේවල් කෙරෙහි විමසිලිමත්ය.

الرِّجَالُ قَوَّامُونَ عَلَى النِّسَاءِ بِمَا فَضَّلَ اللَّهُ بَعْضَهُمْ عَلَىٰ بَعْضٍ وَبِمَا أَنفَقُوا مِنْ أَمْوَالِهِمْ ۚ فَالصَّالِحَاتُ قَانِتَاتٌ حَافِظَاتٌ لِّلْغَيْبِ بِمَا حَفِظَ اللَّهُ ۚ وَاللَّاتِي تَخَافُونَ نُشُوزَهُنَّ فَعِظُوهُنَّ وَاهْجُرُوهُنَّ فِي الْمَضَاجِعِ وَاضْرِبُوهُنَّ ۖ فَإِنْ أَطَعْنَكُمْ فَلَا تَبْغُوا عَلَيْهِنَّ سَبِيلًا ۗ إِنَّ اللَّهَ كَانَ عَلِيًّا كَبِيرًا ﴿٣٥﴾

35. පුරුෂයින් ස්ත්‍රීන්ට ආරක්ෂකයන්ය. මන්ද අල්ලාහ්, ඔවුන්ගෙන් සමහරෙකු සමහරුන්ට වඩා විශිෂ්ඨත්වයට පත් කර ඇති හෙයින්ද, ඔවුන් (පුරුෂයින්) තම ධනයෙන් වැය කරන හෙයින්ද වේ. එබැවින් දැහැමි ස්ත්‍රීහු (නම්) කීකරු (වන්නන්) වන අතර තවද අල්ලාහ්ගේ රැකවරණය සහිතව (තම ස්වාමි පුරුෂයින්ගේ) රහස් රකින්නෝය. තවද ඔවුන්ගේ අකීකරු වීම සම්බන්ධයෙන් නුඹලා බිය වන්නේ නම් ඔවුන්ට අවවාද කරනු. තවද ඔවුන්ව සයනයන්හි වෙන් කර තබනු. තවද ඔවුන්ට සුළු දඬුවම්ද කරනු. ඉන්පසුව ඔවුන් නුඹලාට කීකරු වුවහොත්, ඔවුනට එරෙහිව කිසිඳු මගක් නොසොයනු. නියතවශයෙන්ම අල්ලාහ් උත්තරීතරය, ශ්‍රේෂ්ඨය.

وَإِنْ خِفْتُمْ شِقَاقَ بَيْنِهِمَا فَابْعَثُوا حَكَمًا مِّنْ أَهْلِهِ وَحَكَمًا مِّنْ أَهْلِهَا ۚ

*36. තවද ඔවුනතර භේදයක් වීමට ඉඩ ඇතැයි නුඹලා බිය වන්නේ නම්, ඔහුගේ පාර්ශවයෙන් තීරකයකුද,

*සටහන. 36: මෙහි 'තීරකයින්' යන පදය අනවශ්‍යය බව අපි අදහස් කරන්නෙමු. මන්ද 'ඔවුන්' යන සර්වනාමය දෙපක්ෂයටම අදාල විය හැකිය.

ඇයගේ පාර්ශවයෙන් තීරකයකුද නුඹලා පත් කරනු. ඔවුන් සමගි වීමට කැමැති වන්නේ නම්, අල්ලාහ් ඔවුන් දෙදෙනා අතර එය ඇති කරනු ඇත. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල දන්නාය, සූපරීක්ෂාකාරීය.

إِنْ يُرِيدَآ إِصْلَاحًا يُوَفِّقِ اللّٰهُ بَيْنَهُمَا ؕ إِنَّ اللّٰهَ كَانَ عَلِيمًا خَبِيرًا ﴿٣٦﴾

37. තවද අල්ලාහ් නමදිනු. ඔහුට කිසිවක් සමාන නොකරනු. තවද දෙමාපියන්ටද ඥාතීන්ටද, අනාථයින්ටද, දිළිඳුන්ටද, ඥාතීන් වන අසල්වාසීන්ටද, පිටස්තරයින් වන අසල්වාසීන්ටද, (නුඹලාගේ) සමීපයෙහි සිටින සගයින්ටද, මගීන්ටද, නුඹලාගේ දකුණත් හිමිකරගත් අයටද කරුණාව (දක්වනු). නියතවශයෙන්ම අහංකාර වන්නන් (සහ) පුරසාරම් දොඩවන්නන් අල්ලාහ් ප්‍රිය නොකරන්නේය.

وَاعْبُدُوا اللّٰهَ وَلَا تُشْرِكُوا بِهٖ شَيْئًا وَّبِالْوَالِدَيْنِ إِحْسَانًا وَّبِذِي الْقُرْبٰى وَالْيَتٰمٰى وَالْمَسٰكِينِ وَالْجَارِ ذِي الْقُرْبٰى وَالْجَارِ الْجُنُبِ وَالصَّاحِبِ بِالْجَنْبِ وَابْنِ السَّبِيلِ ۙ وَمَا مَلَكَتْ أَيْمَانُكُمْ ؕ إِنَّ اللّٰهَ لَا يُحِبُّ مَنْ كَانَ مُخْتَالًا فَخُورًا ﴿٣٧﴾

38. ඔවුහු මසුරුය. තවද ජනතාවද මසුරුකමට පොළඹවති. එමෙන්ම අල්ලාහ් ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුනට ලබාදුන් දේ සඟවති. තවද අපි අවිශ්වාසීතයින් වෙනුවෙන් නින්දිත දඬුවමක් පිළියෙල කොට ඇත්තෙමු.

الَّذِينَ يَبْخَلُونَ وَيَأْمُرُونَ النَّاسَ بِالْبُخْلِ وَيَكْتُمُونَ مَآ اٰتٰىهُمُ اللّٰهُ مِنْ فَضْلِهٖ ؕ وَأَعْتَدْنَا لِلْكٰفِرِينَ عَذَابًا مُّهِينًا ﴿٣٨﴾

39. තවද ඔවුන්, තම ධනය මිනිසුන්ට පෙනෙන්නට වැය කරන්නන් මෙන්ම අල්ලාහ් කෙරෙහිද, අවසන් දිනය කෙරෙහිද විශ්වාස නොකරන්නන්ය. තවද කවුරුන් හෝ ඔහුගේ සගයෙකු ලෙස ෂෙයිතාන්ව ගන්නේද, ඔහු ඉතා දුෂ්ඨ සගයෙකු (බව ඔහු සිහි තබා ගනිත්වා!)

وَالَّذِينَ يُنْفِقُونَ أَمْوَالَهُمْ رِئَآءَ النَّاسِ وَلَا يُؤْمِنُونَ بِاللّٰهِ وَلَا بِالْيَوْمِ الْاٰخِرِ ؕ وَمَنْ يَّكُنِ الشَّيْطٰنُ لَهٗ قَرِينًا فَسَآءَ قَرِينًا ﴿٣٩﴾

40. තවද ඔවුන් අල්ලාහ් කෙරෙහිද, අවසන් දිනය කෙරෙහිද, විශ්වාස කරමින් අල්ලාහ් ඔවුනට දුන් දැයින් වැය කළේ නම්, ඔවුන්ට කුමන (හානියක්) අත් වේද? තවද අල්ලාහ් ඔවුන් ගැන මැනැවින් දන්නේය.

وَمَاذَا عَلَيْهِمْ لَوْ اٰمَنُوا بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ وَأَنْفَقُوا مِمَّا رَزَقَهُمُ اللّٰهُ ؕ وَكَانَ اللّٰهُ بِهِمْ عَلِيمًا ﴿٤٠﴾

41. නියතවශයෙන්ම අල්ලාහ් (කිසිවෙකුටත්) එක් අණුවක තරමින් වුවද, හානියක් නොකරන්නේය. තවද, යහපත් ක්‍රියාවක් වේ නම්, ඔහු එය වැඩි කොට ඔහුගෙන් වූ ඉමහත් තිළිණයක් ලබා දෙන්නේය.

إِنَّ اللّٰهَ لَا يَظْلِمُ مِثْقَالَ ذَرَّةٍ ۚ وَإِنْ تَكُ حَسَنَةً يُّضٰعِفْهَا وَيُؤْتِ مِنْ لَّدُنْهُ أَجْرًا عَظِيْمًا ﴿٤١﴾

42. තවද අපි සෑම ජන කොට්ඨාශයකින්ම සාක්ෂිකරුවෙකු කැඳවා, ඔවුන්ට එරෙහිව සාක්ෂිකරුවෙකු ලෙස ඔබව ගෙන ආවේ නම්, (ඔවුන්ගේ තත්ත්වය) කෙසේ වනු ඇත්ද?

فَكَيْفَ إِذَا جِئْنَا مِنْ كُلِّ أُمَّةٍ بِشَهِيْدٍ وَّجِئْنَا بِكَ عَلٰى هٰٓؤُلَآءِ شَهِيْدًا ﴿٤٢﴾

43. එදිනෙහිදී අවිශ්වාස කොට දූතයාණන්ට අවනත නොවූවන්, පොළොව තමන් සමඟම සමතලා කරනු ලැබුවා නම් මැනවැයි පතනු ඇත. තවද ඔවුනට අල්ලාහ්ගෙන් කිසිවක් සඟවා ගත නොහැකි වනු ඇත.

يَوْمَئِذٍ يَّوَدُّ الَّذِيْنَ كَفَرُوْا وَعَصَوُا الرَّسُوْلَ لَوْ تُسَوّٰى بِهِمُ الْأَرْضُ ۗ وَلَا يَكْتُمُوْنَ اللّٰهَ حَدِيْثًا ﴿٤٣﴾

*44. එම්බල විශ්වාසිතයිනි! නුඹලා සිහිමත්ව සිටින විටදී, නුඹලා පවසන දේ කුමක්දැයි පැහැදිලිව නුඹලා දැන ගන්නා තුරුද එමෙන්ම නුඹලා අපවිත්‍රව සිටින විටදීද, නුඹලා මාර්ගයෙහි ගමනක යෙදී සිටින විටදී හැරෙන්නට ස්නානය කරන තුරුද නුඹලා නමස්කාරය වෙත නොයනු. තවද නුඹලා රෝගාතුරව සිටින විටදී හෝ සංචාරයක යෙදී සිටින විටදී හෝ (අපවිත්‍රව) සිටියේ නම් නුඹලාගෙන් කෙනෙකු වැසිකිළියෙන් පැමිණියේ නම් හෝ නුඹලා ස්ත්‍රීන් ස්පර්ශ කර ඇති විටක ජලය සොයාගත නොහැකිවී නම්, පිරිසිදු දූවිල්ල යොදමින් (තයමුම් කරමින්) නුඹලාගේ මුහුණ සහ අත් පිසදා ගනු. නිසැකවම, අල්ලාහ් අති සෞම්‍යය, ඉතා ක්ෂමාන්විතය.

يٰٓأَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَقْرَبُوا الصَّلٰوةَ وَأَنْتُمْ سُكٰرٰى حَتّٰى تَعْلَمُوْا مَا تَقُوْلُوْنَ وَلَا جُنُبًا إِلَّا عَابِرِيْ سَبِيْلٍ حَتّٰى تَغْتَسِلُوْا ۗ وَإِنْ كُنْتُمْ مَّرْضٰٓى أَوْ عَلٰى سَفَرٍ أَوْ جَآءَ أَحَدٌ مِّنْكُمْ مِّنَ الْغَآئِطِ أَوْ لٰمَسْتُمُ النِّسَآءَ فَلَمْ تَجِدُوْا مَآءً فَتَيَمَّمُوْا صَعِيْدًا طَيِّبًا فَامْسَحُوْا بِوُجُوْهِكُمْ وَأَيْدِيْكُمْ ۗ إِنَّ اللّٰهَ كَانَ عَفُوًّا غَفُوْرًا ﴿٤٤﴾

*සටහන. 44: මෙහි 'අපවිත්‍රව' යන පදය ප්‍රශ්නාර්ථයකි. මන්ද 'ජුනුබන්'( جُنُبًا )යන අරාබි පදය යමෙකු සංසර්ගයෙහි යෙදී හෝ සංසර්ගයෙහි නොයෙදී හෝ ධාතු පිටවූ තත්ත්වයට යෙදෙයි. එවන් අවස්ථාවලදී නමස්කාරයට පෙර ස්නානය කිරීම අනිවාර්ය වේ.

45. පුස්තකයෙන් කොටසක් දෙන ලද්දවුන් ගැන නුඹ නොදන්නෙහිද? ඔවුහු දුර්මාර්ගය මිලට ගෙන, නුඹලාද නොමග යන්නට කැමැති වෙති.

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ اُوْتُوْا نَصِيْبًا مِّنَ الْكِتٰبِ يَشْتَرُوْنَ الضَّلٰلَةَ وَيُرِيْدُوْنَ اَنْ تَضِلُّوا السَّبِيْلَ ﴿٤٥﴾

46. තවද අල්ලාහ් නුඹලාගේ සතුරන්ව මැනැවින් දන්නේය. තවද අල්ලාහ් මිත්‍රයෙකු වශයෙන් ප්‍රමාණවත්ය. තවද අල්ලාහ් උදව්කරුවෙකු වශයෙන් ප්‍රමාණවත්ය.

وَاللّٰهُ اَعْلَمُ بِاَعْدَآئِكُمْ ؕ وَكَفٰى بِاللّٰهِ وَلِيًّا ۙ وَّكَفٰى بِاللّٰهِ نَصِيْرًا ﴿٤٦﴾

*47. වචනයන් ඒවායෙහි (නිසි) තැන්වලින් විකෘති කරන්නාවූ සමහරුන් යුදෙව්වරුන් අතර වෙති. තවද 'අපි සවන් දුන්නෙමු, අපි අවනත නොවන්නෙමු'යිද නොඅසන්නෙකු සේ '(ඔබ) සවන් දෙනු'යිද, තවද 'රාඉනා' යැයිද (ඔවුන්ගේ සිත්හි ඇති දේ) ඔවුන්ගේ දිව් හරවමින් දහමට දොස් පැවරීමේ (අදහසින්) පවසති. තවද 'අපි සවන් දෙන්නෙමු, අපි අවනත වන්නෙමු'යිද, 'ඔබ අසනු'යිද 'උන්සුzර්නා' යැයිද ඔවුන් පැවසුවේ නම්, එය ඔවුන්ට වඩා යහපත් මෙන්ම වඩා නිවරැදි වන්නට තිබුණි. නමුත් ඔවුන්ගේ අවිශ්වාසිතභාවය හේතුවෙන් අල්ලාහ් ඔවුන්ට ශාප කළේය. එබැවින් ඔවුන් ස්වල්පයක් මිස විශ්වාස නොකරති.

مِنَ الَّذِيْنَ هَادُوْا يُحَرِّفُوْنَ الْكَلِمَ عَنْ مَّوَاضِعِهٖ وَيَقُوْلُوْنَ سَمِعْنَا وَعَصَيْنَا وَاسْمَعْ غَيْرَ مُسْمَعٍ وَّرَاعِنَا لَيًّاۢ بِاَلْسِنَتِهِمْ وَطَعْنًا فِى الدِّيْنِ ؕ وَلَوْ اَنَّهُمْ قَالُوْا سَمِعْنَا وَاَطَعْنَا وَاسْمَعْ وَانْظُرْنَا لَكَانَ خَيْرًا لَّهُمْ وَاَقْوَمَ ۙ وَلٰكِنْ لَّعَنَهُمُ اللّٰهُ بِكُفْرِهِمْ فَلَا يُؤْمِنُوْنَ اِلَّا قَلِيْلًا ﴿٤٧﴾

---

* සටහන. 47: හුදෙක් පරිවර්තනය කිරීමෙන් පමණක් මෙම වාක්‍ය කොටසෙහි සත්‍ය වැදගත්කමට සාධාරණයක් ඉටුකළ නොහැක. මන්ද ශුද්ධවූ වක්තෘවරයාණන්ට නිග්‍රහ කරනු අදහසින් පොදුවේ භාවිතා වන සමහර වාක්‍යයන්ට වැරදි තේරුමක් ගෙන දෙමින් උවමනාවෙන්ම වැරදි ලෙස උච්චාරණය කරන බවට මෙහිදී කුහකයින්ව විග්‍රහ කරනු ලැබ ඇත. විශ්වාසිතයින් භාවිතා කළ පදය වන 'සමිඃනා වඅතඃනා' ( سَمِعْنَا وَاَطَعْنَا ) 'අපි සවන් දුන්නෙමු, අපි අවනත වුවෙමු' යන තේරුම ගෙන දෙයි. කුහකයින්, 'අතඃනා' ( اَطَعْنَا )යන වචනය වෙනුවට 'අසයිනා'( عَصَيْنَا ) (මෙහිදී එන පාඨයෙහි යෙදී ඇති නියම වචනය) යනුවෙන් පැවසූ අතර එහි තේරුම 'අපි සවන් දුන්නෙමු, අපි අවනත නොවුයෙමු' වේ. එහෙත් ඔවුන් එය සුළු ඇදකිරීමක් ඇතිව උච්චාරණය කරමින් 'අසයිනා'( عَصَيْنَا ) වෙනුවට 'අතඃනා ( اَطَعْنَا ) යැයි පැවසූ බවට සවන්දෙන්නාව මුලාකර විශ්වාස කරවීමට අදහස් කරති. කෙසේ වෙතත් තියුණු ලෙස සවන් දෙන්නෙකු හට ඔවුන්ගේ කවට කම සහ නිග්‍රහ කිරීම නොඇසී නොයනු ඇත.

නැවතත් ඔවුන් 'රාඉනා'( رَاعِنَا ) යන වචනය දිව ඇදකරමින් 'රාඉනා'( رَاعِنَا ) සහ 'රාඊනා' ( رَاعِيْنَا )යන වචන දෙක අතර ශබ්දයක් ඇති කරමින් පවසති. 'රාඉනා'( رَاعِنَا )හි අරුත 'අපට ලිහිල් වන්න'යි වන අතර 'රාඊනා'( رَاعِيْنَا )හි අරුත 'එම්බා, අපගේ බැටළු රකින්නාණෙනි' යන්න වේ. මෙයද නැවතත් උච්චාරණය මුවාවෙන් ශුද්ධ වූ වක්තෘවරයාණන්ට නිග්‍රහ කිරීමේ වෑයමක් විය.

48. එම්බල පුස්තකයෙහි ජනතාවෙනි! අප නුඹලාගේ (සමහර) නායකයින් නින්දාවට පත්කර ඔවුන් පිටුපස හරවමින් ඔවුන්ගේ විළුඹ මතින් හැරී දුවන්නට පෙර හෝ සබත්හි ජනතාවට අප ශාප කළාක් මෙන් ඔවුන්ටත් ශාප කිරීමට පෙර නුඹලා වෙත තිබෙන්නාවූ දේ සත්‍ය කරන්නාවූ, අප පහළ කළ දැය කෙරෙහි විශ්වාස කරනු. තවද අල්ලාහ්ගේ නියමය ඉටු වීම නියතය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ أُوتُوا۟ ٱلْكِتَٰبَ ءَامِنُوا۟ بِمَا نَزَّلْنَا مُصَدِّقًا لِّمَا مَعَكُم مِّن قَبْلِ أَن نَّطْمِسَ وُجُوهًا فَنَرُدَّهَا عَلَىٰٓ أَدْبَارِهَآ أَوْ نَلْعَنَهُمْ كَمَا لَعَنَّآ أَصْحَٰبَ ٱلسَّبْتِ ۚ وَكَانَ أَمْرُ ٱللَّهِ مَفْعُولًا ﴿٤٨﴾

49. නියතවශයෙන්ම අල්ලාහ්, ඔහුට සහකරුවෙකු හවුල් කිරීම ක්ෂමා නොකරන්නේය. නමුත් ඊට අඩුවූ ඕනෑම දෙයකට ඔහු කැමැති ඕනෑම කෙනෙකුට ක්ෂමාව දෙන්නේය. තවද කවුරුන් හෝ අල්ලාහ්ට සහකරුවන් හවුල් කරන්නේද, ඔහු ඇත්තෙන්ම මහත්වූ පාපයක් ඇති කළේය.

إِنَّ ٱللَّهَ لَا يَغْفِرُ أَن يُشْرَكَ بِهِۦ وَيَغْفِرُ مَا دُونَ ذَٰلِكَ لِمَن يَشَآءُ ۚ وَمَن يُشْرِكْ بِٱللَّهِ فَقَدِ ٱفْتَرَىٰٓ إِثْمًا عَظِيمًا ﴿٤٩﴾

50. තමන් පවිත්‍ර යැයි පවසන්නන් ගැන ඔබ නොදන්නෙහිද? නොඑසේය, අල්ලාහ්, ඔහු කැමැති කෙනෙකුව පවිත්‍ර කරන්නේය, තවද ඔවුහු අංශු මාත්‍රයකවත් වැරැද්දක් කරනු නොලබන්නෝය.

أَلَمْ تَرَ إِلَى ٱلَّذِينَ يُزَكُّونَ أَنفُسَهُم ۚ بَلِ ٱللَّهُ يُزَكِّى مَن يَشَآءُ وَلَا يُظْلَمُونَ فَتِيلًا ﴿٥٠﴾

51. බලනු! අල්ලාහ්ට එරෙහිව ඔවුන් කෙසේ බොරු ගොතන්නෙහුද? තවද ප්‍රකට පාපයකට එයම ප්‍රමාණවත් වේ.

ٱنظُرْ كَيْفَ يَفْتَرُونَ عَلَى ٱللَّهِ ٱلْكَذِبَ ۖ وَكَفَىٰ بِهِۦٓ إِثْمًا مُّبِينًا ﴿٥١﴾

52. පුස්තකයෙන් කොටසක් දෙනු ලැබුවන් ගැන ඔබ නොදන්නෙහිද? ඔවුහු මිථ්‍යා දේවල් කෙරෙහි විශ්වාස කරමින් සීමාව ඉක්මවන්නන්ව (අනුගමනය) කරති. එමෙන්ම ඔවුහු අවිශ්වාසිතයින් පිළිබඳව 'මොවුහු විශ්වාසිතයින්ට වඩා හොඳින් ආගමෙහි මග පෙන්වන ලද්දන් යැ'යි කියති.

أَلَمْ تَرَ إِلَى ٱلَّذِينَ أُوتُوا۟ نَصِيبًا مِّنَ ٱلْكِتَٰبِ يُؤْمِنُونَ بِٱلْجِبْتِ وَٱلطَّٰغُوتِ وَيَقُولُونَ لِلَّذِينَ كَفَرُوا۟ هَٰٓؤُلَآءِ أَهْدَىٰ مِنَ ٱلَّذِينَ ءَامَنُوا۟ سَبِيلًا ﴿٥٢﴾

53. අල්ලාහ් ශාප කර ඇත්තේ ඔවුන්ටමය. තවද කවරෙකුට හෝ අල්ලාහ් ශාප කළේ නම් ඔහුට උදව්කරුවෙකු ඔබ නොදකින්නේය.

أُو۟لَٰٓئِكَ ٱلَّذِينَ لَعَنَهُمُ ٱللَّهُ ۖ وَمَن يَلْعَنِ ٱللَّهُ فَلَن تَجِدَ لَهُۥ نَصِيرًا ﴿٥٣﴾

اَمْ لَهُمْ نَصِيْبٌ مِّنَ الْمُلْكِ فَاِذًا لَّا يُؤْتُوْنَ النَّاسَ نَقِيْرًا ﴿٥٤﴾

54. ඔවුනට රාජ්‍යයෙහි කොටසක් ඇත්තේද? එසේනම්, ඔවුහු මිනිසුන්ට ඉඳි ඇටයක මතුපිටෙහි වූ කුඩා සිදුරක (තරම්වත්) නොදෙන්නෙහුය.

اَمْ يَحْسُدُوْنَ النَّاسَ عَلٰى مَاۤ اٰتٰهُمُ اللّٰهُ مِنْ فَضْلِهٖ ۚ فَقَدْ اٰتَيْنَاۤ اٰلَ اِبْرٰهِيْمَ الْكِتٰبَ وَالْحِكْمَةَ وَاٰتَيْنٰهُمْ مُّلْكًا عَظِيْمًا ﴿٥٥﴾

55. නැතිනම්, අල්ලාහ්, ඔහුගේ වරප්‍රසාදයෙන් මිනිසුන්ට ලබා දුන් දේවල් ගැන ඔවුන් ඊර්ෂ්‍යා කරන්නෙහුද? (එය එසේනම්) නියතවශයෙන්ම අපි ඉබ්රාහීම්ගේ දරුවන්ට(ද) පුස්තකය සහ ප්‍රඥාව දුනිමු. (එමෙන්ම) අපි ඔවුන්ට ශ්‍රේෂ්ඨවූ රාජ්‍යයක්ද දුනිමු.

فَمِنْهُمْ مَّنْ اٰمَنَ بِهٖ وَمِنْهُمْ مَّنْ صَدَّ عَنْهُ ؕ وَكَفٰى بِجَهَنَّمَ سَعِيْرًا ﴿٥٦﴾

56. තවද ඔහු කෙරෙහි විශ්වාස කළ සමහරෙක්ද ඔවුනතර වූහ. තවද ඔහුට පිටුපෑ තවත් සමහරෙක්ද ඔවුනතර වූහ. තවද නිරය දැවෙන ගින්නක් සේ ප්‍රමාණවත්ය.

اِنَّ الَّذِيْنَ كَفَرُوْا بِاٰيٰتِنَا سَوْفَ نُصْلِيْهِمْ نَارًا ؕ كُلَّمَا نَضِجَتْ جُلُوْدُهُمْ بَدَّلْنٰهُمْ جُلُوْدًا غَيْرَهَا لِيَذُوْقُوا الْعَذَابَ ؕ اِنَّ اللّٰهَ كَانَ عَزِيْزًا حَكِيْمًا ﴿٥٧﴾

57. අපගේ සළකුණු අවිශ්වාස කරනවුන්ව, අපි නොපමාව ගින්නෙහි ඇතුළු කරන්නෙමු. ඔවුන්ගේ සම් පිළිස්සී යනවාත් සමගම, ඔවුන් දඬුවම් විඳිනු පිණිස, අපි වෙනත් සම් ඒ වෙනුවෙට ඔවුනට යොදවන්නෙමු. නියතවශයෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ سَنُدْخِلُهُمْ جَنّٰتٍ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَاۤ اَبَدًا ؕ لَهُمْ فِيْهَاۤ اَزْوَاجٌ مُّطَهَّرَةٌ ۫ وَّنُدْخِلُهُمْ ظِلًّا ظَلِيْلًا ﴿٥٨﴾

58. තවද විශ්වාස කොට යහපත් ක්‍රියා කරනවුන්ව, අපි එතුලින් ගලාබස්නා දිය දහරාවලින් යුත් උද්‍යානයන්හි සදාකල්හි වෙසෙනු පිණිස, ඔවුන්ව එහි ඇතුළු කරන්නෙමු. එහිදී ඔවුනට (අප විසින්) පවිත්‍ර කරන ලද කලත්‍රයන් ලැබෙනු ඇත. අපි ඔවුන්ව ප්‍රසන්න වූද, පුළුල් වූද සෙවනෙන් යුත් (ස්ථානයකට) ඇතුළු කරන්නෙමු.

اِنَّ اللّٰهَ يَاْمُرُكُمْ اَنْ تُؤَدُّوا الْاَمٰنٰتِ اِلٰۤى اَهْلِهَا ۙ وَاِذَا حَكَمْتُمْ بَيْنَ النَّاسِ اَنْ

59. නුඹලා භාරයන් (අමානාත්) ඒවා සුදුසු අය හට භාර දෙන ලෙසටද, මිනිසුන් අතර විනිශ්චය කිරීමේදී යුක්තියෙන් යුතුව විනිශ්චය කරන ලෙසද ඇත්තෙන්ම අල්ලාහ් නුඹලාට

අණ කරන්නේය. තවද නියතවශයෙන්ම අල්ලාහ් නුඹලාට අවවාද කරන දේ විශිෂ්ටය! අල්ලාහ් සියල්ල අසන්නාය. සියල්ල දකින්නාය.

تَحْكُمُوْا بِالْعَدْلِ ؕ اِنَّ اللّٰهَ نِعِمَّا يَعِظُكُمْ بِهٖ ؕ اِنَّ اللّٰهَ كَانَ سَمِيْعًا بَصِيْرًا ﴿٥٩﴾

* 60. විශ්වාසිතයිනි! අල්ලාහ්ට අවනත වනු. තවද (ඔහුගේ) දූතයාණන්ටත් අවනත වනු. තවද නුඹලාට ඉහළින් බලතලවල සිටින අයටත් අවනත වනු. ඉන්පසු නුඹලා අතර යම් දෙයක් පිළිබඳව නුඹලා භේද වුවහොත් නුඹලා අල්ලාහ් කෙරෙහිද, අවසන් දිනය කෙරෙහිද විශ්වාස කරන්නේ නම්, එය අල්ලාහ් සහ (ඔහුගේ) දූතයාණන් වෙත යොමු කරනු. එය ඉතා විශිෂ්ට මෙන්ම අවසානයේදී ප්‍රසංශනියද වනු ඇත.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اَطِيْعُوا اللّٰهَ وَاَطِيْعُوا الرَّسُوْلَ وَاُولِى الْاَمْرِ مِنْكُمْ ۚ فَاِنْ تَنَازَعْتُمْ فِىْ شَىْءٍ فَرُدُّوْهُ اِلَى اللّٰهِ وَالرَّسُوْلِ اِنْ كُنْتُمْ تُؤْمِنُوْنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ ؕ ذٰلِكَ خَيْرٌ وَّاَحْسَنُ تَاْوِيْلًا ﴿٦٠﴾

61. ඔබ වෙත පහල කරනු ලැබූ දේ කෙරෙහිත්, ඔබට පෙර පහළ කළ දේ කෙරෙහිත් තමන් විශ්වාස කරන බව පවසන අය ඔබ නොදන්නෙහිද? කැරලිකරුවන්ට අවනත නොවන ලෙස මොවුන් වෙත අණකර තිබියදීත්, මොවුන් ඔවුන්ගෙන් තීන්දුව ලබාගැනීමට කැමැති වෙති. තවද මොවුන්ව දුර්මාර්ගයෙහි ඈතට යොමුකිරීමට ෂෙයිතාන් කැමැති වෙයි.

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ يَزْعُمُوْنَ اَنَّهُمْ اٰمَنُوْا بِمَاۤ اُنْزِلَ اِلَيْكَ وَمَاۤ اُنْزِلَ مِنْ قَبْلِكَ يُرِيْدُوْنَ اَنْ يَّتَحَاكَمُوْۤا اِلَى الطَّاغُوْتِ وَقَدْ اُمِرُوْۤا اَنْ يَّكْفُرُوْا بِهٖ ؕ وَيُرِيْدُ الشَّيْطٰنُ اَنْ يُّضِلَّهُمْ ضَلٰلًاۢ بَعِيْدًا ﴿٦١﴾

62. තවද 'නුඹලා අල්ලාහ් පහළ කළ දේ වෙතද (ඔහුගේ) වක්තෘවරයාණන් වෙතද එනු'යි ඔවුනට පවසනු ලැබූ කල්හි, කුහකයින් ඔබගෙන් පිළිකුලෙන් යුතුව පිටුපෑ යෑම ඔබ දකින්නෙහිය.

وَاِذَا قِيْلَ لَهُمْ تَعَالَوْا اِلٰى مَاۤ اَنْزَلَ اللّٰهُ وَاِلَى الرَّسُوْلِ رَاَيْتَ الْمُنٰفِقِيْنَ يَصُدُّوْنَ عَنْكَ صُدُوْدًا ﴿٦٢﴾

* සටහන. 60 : 'උලිල් අම්රි මින්කුම්' ( اُولِي الْاَمْرِ مِنْكُمْ )(නුඹලාට ඉහලින් බලතලවල සිටින අය) යන අරාබි පදයෙහි ගොඩනැගුම සමහරු විසින් හොඳින් වටහාගෙන නොමැත. මෙහිදී විශේෂයෙන් 'මින්කුම්' ( مِنْكُمْ )යන පදය 'මින්' ( مِنْ )සහ 'කුම්' ( كُمْ )යන පද දෙක සන්ධිවීමෙන් සෑදී ඇත. මෙහිදී 'මින්' ( مِنْ ) යන්නෙන් 'ගෙන්' සහ 'කුම්'( كُمْ ) යන්නෙන් 'නුඹලා' යන අර්ථය දේ. මෙම වාක්‍යඛණ්ඩය සමහර පරිවර්තකයින් වචනාර්ථයෙන්ම පරිවර්තනය කරමින් 'නුඹලා අතරින්' යන අර්ථය අදහස් කරන්නෝය. මෙමගින්, නුඹලා අවනත විය යුත්තේ නුඹලා අතරින් වන බලධාරින්ට පමණක්, එනම් මුස්ලිම් බලධාරින්ට පමණක් යන අරුතක් ගෙන දේ. මෙම යෙදුමෙහි 'මින් ( مِنْ )යන වාක්‍යය හුදෙක් 'කුම්' ( كُمْ )යන වාක්‍යය 'උලිල් අම්රි' ( اُولِى الْاَمْرِ )යන පදය හා සම්බන්ධ කිරීමට පමණක් යොදාගෙන ඇත. එබැවින් මේවායෙහි සම්බන්ධය ගත් කළ පරිවර්තනය 'නුඹලාට ඉහලින් බලතලවල සිටින අය' යනුවෙන් විය යුතුය.

63. එසේනම්, ඔවුන්ගේ දෑත් පෙර සිදුකළ ක්‍රියාවන් හේතුවෙන් ඔවුනට විපතක් සිදුවූ කල්හි, එය කෙසේ වේවිද? ඔවුන් 'අපි කාරුණික ක්‍රියාවක් සහ සමගිය ඇතිකිරීම මිස අන් කිසිවක් අදහස් නොකළෙමු'යි (පවසමින්) අල්ලාහ්ගේ නාමයෙන් දිවුරමින් ඔබ වෙත පැමිණෙන්නෙහිය.

فَكَيْفَ إِذَآ أَصَابَتْهُم مُّصِيبَةٌۢ بِمَا قَدَّمَتْ أَيْدِيهِمْ ثُمَّ جَآءُوكَ يَحْلِفُونَ بِٱللَّهِ إِنْ أَرَدْنَآ إِلَّآ إِحْسَٰنًا وَتَوْفِيقًا ﴿٦٣﴾

64. මේ අය ඔවුහුය. ඔවුන්ගේ හදවත්හි ඇති රහස් අල්ලාහ් හොඳින් දන්නේය. එබැවින් ඔවුන්ගෙන් ඉවත හැරෙනු. තවද ඔවුනට අවවාද කරනු. තවද ඔවුන් පිළිබඳව ඔවුනට කාවදින වදනක් පවසනු.

أُو۟لَٰٓئِكَ ٱلَّذِينَ يَعْلَمُ ٱللَّهُ مَا فِى قُلُوبِهِمْ فَأَعْرِضْ عَنْهُمْ وَعِظْهُمْ وَقُل لَّهُمْ فِىٓ أَنفُسِهِمْ قَوْلًۢا بَلِيغًا ﴿٦٤﴾

65. තවද අල්ලාහ්ගේ අණ පරිදි ඔහුට (දූතයාට) අවනත විය යුතු පිණිස මිස අපි කිසිම දූතයෙකු නොඑව්වෙමු. තවද ඔවුන් ඔවුන්ගේ ආත්මයන්ට වැරදි කර ඔබ වෙත පැමිණි විට, අල්ලාහ්ගේ ක්ෂමාව අයැද සිටියේ නම්, එමෙන්ම දූතයාණන්ද ඔවුන් වෙනුවෙන් ක්ෂමාව අයැද සිටියේ නම්, නිසැකවම අල්ලාහ් (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය, දයාබරය, යන්න ඔවුන් දැකගන්නට තිබුණි.

وَمَآ أَرْسَلْنَا مِن رَّسُولٍ إِلَّا لِيُطَاعَ بِإِذْنِ ٱللَّهِ ۚ وَلَوْ أَنَّهُمْ إِذ ظَّلَمُوٓا۟ أَنفُسَهُمْ جَآءُوكَ فَٱسْتَغْفَرُوا۟ ٱللَّهَ وَٱسْتَغْفَرَ لَهُمُ ٱلرَّسُولُ لَوَجَدُوا۟ ٱللَّهَ تَوَّابًا رَّحِيمًا ﴿٦٥﴾

66. එහෙත්, එසේනොව ඔබගේ අධිපතියාණන්ගේ නාමයෙන්, ඔවුනතර භේද වූ දේ පිළිබඳව විනිශ්චය සඳහා ඔබව පත් කර, ඔබගේ තීරණය ගැන ඔවුන්ගේ හදවත්හි කිසිඳු විරුද්ධත්වයක් නොමැතිව සම්පූර්ණ අවනතභාවයෙන් අවනත වන තුරු ඔවුහු විශ්වාසිතයින් නොවන්නෝය.

فَلَا وَرَبِّكَ لَا يُؤْمِنُونَ حَتَّىٰ يُحَكِّمُوكَ فِيمَا شَجَرَ بَيْنَهُمْ ثُمَّ لَا يَجِدُوا۟ فِىٓ أَنفُسِهِمْ حَرَجًا مِّمَّا قَضَيْتَ وَيُسَلِّمُوا۟ تَسْلِيمًا ﴿٦٦﴾

67. තවද අපි ඔවුනට 'නුඹලා නුඹලාගේ (දුෂ්ඨ) ආශාවන් ඝාතනය කරනු. නැතහොත් නුඹලාගේ නිවෙස්වලින් බැහැර යනු'යි අණ කළහොත් ඔවුන්ගෙන් කිහිපදෙනෙකු මිස එසේ නොකරනු ඇත. ඔවුන්ට

وَلَوْ أَنَّا كَتَبْنَا عَلَيْهِمْ أَنِ ٱقْتُلُوٓا۟ أَنفُسَكُمْ أَوِ ٱخْرُجُوا۟ مِن دِيَٰرِكُم مَّا فَعَلُوهُ إِلَّا قَلِيلٌ مِّنْهُمْ ۖ وَلَوْ أَنَّهُمْ

فَعَلُوا مَا يُوعَظُونَ بِهِ لَكَانَ خَيْرًا لَّهُمْ وَأَشَدَّ تَثْبِيتًا ﴿٦٧﴾

අණ කරනු ලැබූ දේ ඔවුන් කළේ නම් නියතවශයෙන්ම එය ඔවුනට වඩාත් යහපත් වනු ඇති අතර දැඩි ස්ථිරසාර වන්නට හේතු වනු ඇත.

وَإِذًا لَّآتَيْنَاهُم مِّن لَّدُنَّا أَجْرًا عَظِيمًا ﴿٦٨﴾

68. තවද එවිට, නියතවශයෙන්ම අප ඔවුනට අප වෙතින් අති මහත් වූ තිළිණයක් ලබා දෙන්නට තිබුණි.

وَلَهَدَيْنَاهُمْ صِرَاطًا مُّسْتَقِيمًا ﴿٦٩﴾

69. තවද නියතවශයෙන්ම අප විසින් ඔවුන්ව සෘජු මාර්ගයට යොමු කරන්නට තිබුණි.

وَمَن يُطِعِ اللَّهَ وَالرَّسُولَ فَأُولَٰئِكَ مَعَ الَّذِينَ أَنْعَمَ اللَّهُ عَلَيْهِم مِّنَ النَّبِيِّينَ وَالصِّدِّيقِينَ وَالشُّهَدَاءِ وَالصَّالِحِينَ ۚ وَحَسُنَ أُولَٰئِكَ رَفِيقًا ﴿٧٠﴾

70. තවද කවුරුන් හෝ අල්ලාහ්ටද, (ඔහුගේ) මෙම දූතයාණන්ටද අවනත වන්නේද, එවැන්නන් අල්ලාහ් ආශිර්වාද කළ අය වන වක්තෘවරුන්, සත්‍යවාදීන්, දිවිපිදුවන් සහ ධාර්මිෂ්ඨකයින් ගෙන් අය වනු ඇත. මොවුහු අති විශිෂ්ට සගයින් වන්නෝය.

ذَٰلِكَ الْفَضْلُ مِنَ اللَّهِ ۚ وَكَفَىٰ بِاللَّهِ عَلِيمًا ﴿٧١﴾

71. මෙම අනුග්‍රහය අල්ලාහ් ගෙන්ය. තවද අල්ලාහ් ප්‍රමාණවත්ය, සියල්ල දන්නාය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا خُذُوا حِذْرَكُمْ فَانفِرُوا ثُبَاتٍ أَوِ انفِرُوا جَمِيعًا ﴿٧٢﴾

72. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේ පූර්වෝපාය සළසා ගනිවු. පසුව වෙන් වෙන් කණ්ඩායම් වශයෙන් පෙරට යනු. නැත්නම් සියල්ල සාමුහිකව පෙරට යනු.

وَإِنَّ مِنكُمْ لَمَن لَّيُبَطِّئَنَّ فَإِنْ أَصَابَتْكُم مُّصِيبَةٌ قَالَ قَدْ أَنْعَمَ اللَّهُ عَلَيَّ إِذْ لَمْ أَكُن مَّعَهُمْ شَهِيدًا ﴿٧٣﴾

73. තවද නුඹලා අතර පසු බට වන අයද සිටිති. නුඹලාට යම් විපතක් සිදුවූ විටදී 'නියතවශයෙන්ම අල්ලාහ් මා හට දැක්වූ අනුග්‍රහය හේතුවෙන් මා ඔවුන් සමඟ නොසිටියෙමි'යි පවසති.

74. එහෙත් අල්ලාහ්ගෙන් නුඹලාට යම්කිසි භාග්‍යයක් ලැබුණේ නම්, 'මාත් ඔවුන් සමඟ සිටියා නම් විශිෂ්ට ජයක් ලබනු නියතයැ'යි නුඹලා සහ ඔහු අතර කිසිදු දැන හැඳිනීමක් නොතිබුණාසේ ඔහු පවසයි.

وَلَئِنْ اَصَابَكُمْ فَضْلٌ مِّنَ اللّٰهِ لَيَقُوْلَنَّ
كَاَنْ لَّمْ تَكُنْ بَيْنَكُمْ وَبَيْنَهٗ مَوَدَّةٌ
يّٰلَيْتَنِيْ كُنْتُ مَعَهُمْ فَاَفُوْزَ فَوْزًا عَظِيْمًا ﴿٧٤﴾

75. එසේනම්, පරලොව වෙනුවෙන් මෙලොව ජීවිතය අත්හරින්නාවූ අය, අල්ලාහ්ගේ මාර්ගයේ සටන් කරත්වා. තවද, යමෙකු අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කර ඝාතනය කරනු ලැබුවේ නම් හෝ ජය ලැබුවේ නම්, අපි ඔහුට ඉමහත් වූ තිළිණයක් ඉක්මනින් පිරිනමන්නෙමු.

فَلْيُقَاتِلْ فِيْ سَبِيْلِ اللّٰهِ الَّذِيْنَ يَشْرُوْنَ
الْحَيٰوةَ الدُّنْيَا بِالْاٰخِرَةِ ؕ وَمَنْ يُّقَاتِلْ فِيْ
سَبِيْلِ اللّٰهِ فَيُقْتَلْ اَوْ يَغْلِبْ فَسَوْفَ
نُؤْتِيْهِ اَجْرًا عَظِيْمًا ﴿٧٥﴾

76. අල්ලාහ්ගේ මාර්ගයෙහි මෙන්ම දුබල පුරුෂයන්, ස්ත්‍රීන් හා ළමයින් වෙනුවෙන් නුඹලා සටන් නොකර සිටීමට නුඹලාට කුමක් සිදුවී ඇත්ද? 'අපගේ අධිපතියාණෙනි, හිංසාකරුවන් වන මෙම ජනයාගේ නගරයෙන් බැහැර කර අපට ඔබ වෙතින් යම් මිත්‍රයෙකු දෙනු මැනව. තවද, අපට ඔබ වෙතින් යම් උදව්කරුවෙකුද දෙනු මැනව'යි ඔවුන් පවසති.

وَمَا لَكُمْ لَا تُقَاتِلُوْنَ فِيْ سَبِيْلِ اللّٰهِ
وَالْمُسْتَضْعَفِيْنَ مِنَ الرِّجَالِ وَالنِّسَآءِ
وَالْوِلْدَانِ الَّذِيْنَ يَقُوْلُوْنَ رَبَّنَآ اَخْرِجْنَا
مِنْ هٰذِهِ الْقَرْيَةِ الظَّالِمِ اَهْلُهَا ۚ
وَاجْعَلْ لَّنَا مِنْ لَّدُنْكَ وَلِيًّا ۙۚ وَّاجْعَلْ لَّنَا
مِنْ لَّدُنْكَ نَصِيْرًا ؕ﴿٧٦﴾

77. විශ්වාස කරන්නන් අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කරති. තවද, අවිශ්වාසිතයින් දුෂ්ඨයාගේ මාර්ගයෙහි සටන් කරති. එබැවින්, නුඹලා ෂෙයිතාන්ගේ මිතුරන්ට එරෙහිව සටන් කරනු. නියතවශයෙන්ම ෂෙයිතාන්ගේ උපක්‍රමය දුර්වලය!

اَلَّذِيْنَ اٰمَنُوْا يُقَاتِلُوْنَ فِيْ سَبِيْلِ اللّٰهِ ۚ
وَالَّذِيْنَ كَفَرُوْا يُقَاتِلُوْنَ فِيْ سَبِيْلِ
الطَّاغُوْتِ فَقَاتِلُوْٓا اَوْلِيَآءَ الشَّيْطٰنِ ۚ اِنَّ
كَيْدَ الشَّيْطٰنِ كَانَ ضَعِيْفًا ﴿٧٧﴾ ع

78. 'නුඹලාගේ අත් වළක්වා ගනිවු,

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ قِيْلَ لَهُمْ كُفُّوْٓا اَيْدِيَكُمْ

وَاَقِيْمُوا الصَّلٰوةَ وَاٰتُوا الزَّكٰوةَ ۚ فَلَمَّا كُتِبَ عَلَيْهِمُ الْقِتَالُ اِذَا فَرِيْقٌ مِّنْهُمْ يَخْشَوْنَ النَّاسَ كَخَشْيَةِ اللّٰهِ اَوْ اَشَدَّ خَشْيَةً ۚ وَقَالُوْا رَبَّنَا لِمَ كَتَبْتَ عَلَيْنَا الْقِتَالَ ۚ لَوْلَآ اَخَّرْتَنَآ اِلٰٓى اَجَلٍ قَرِيْبٍ ۗ قُلْ مَتَاعُ الدُّنْيَا قَلِيْلٌ ۚ وَالْاٰخِرَةُ خَيْرٌ لِّمَنِ اتَّقٰى وَلَا تُظْلَمُوْنَ فَتِيْلًا ﴿٧٨﴾

නමස්කාරයෙහි නිරතවනු. තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු'යි පවසනු ලැබූවන් ගැන ඔබ නොදන්නෙහිද? නමුත් ඔවුන්ට සටන් කිරීම නියම කරනු ලැබූ කල්හි, බලනු! ඔවුන්ගෙන් පිරිසක් අල්ලාහ් කෙරෙහි බිය දැක්විය යුතු පරිදි හෝ ඊටත් වඩා වැඩියෙන් මිනිසුන්ට බියවන්නෝය. එමෙන්ම 'අපගේ අධිපතියාණෙනි, ඔබ අප හට සටන් කිරීම නියම කළේ මන්ද? ඔබ අප හට තව ටික කාල විරාමයක් නොදෙන්නේදැ?'යි ඔවුහු පවසති. පවසන්න, 'මෙලොවෙහි එල ප්‍රයෝජන ස්වල්පය, තවද (අල්ලාහ් කෙරෙහි) බිය දක්වන්නාට පරලොව ඉතා අගනේය. තවද නුඹලා අල්ප මාත්‍රයක් හෝ වැරදි කරනු නොලබන්නෙහුය.'

اَيْنَ مَا تَكُوْنُوْا يُدْرِكْكُّمُ الْمَوْتُ وَلَوْ كُنْتُمْ فِيْ بُرُوْجٍ مُّشَيَّدَةٍ ۗ وَاِنْ تُصِبْهُمْ حَسَنَةٌ يَّقُوْلُوْا هٰذِهٖ مِنْ عِنْدِ اللّٰهِ ۚ وَاِنْ تُصِبْهُمْ سَيِّئَةٌ يَّقُوْلُوْا هٰذِهٖ مِنْ عِنْدِكَ ۗ قُلْ كُلٌّ مِّنْ عِنْدِ اللّٰهِ ۗ فَمَالِ هٰٓؤُلَآءِ الْقَوْمِ لَا يَكَادُوْنَ يَفْقَهُوْنَ حَدِيْثًا ﴿٧٩﴾

79. නුඹලා කොතැනක සිටියද, නුඹලා ශක්තිමත් ලෙස තැනූ බලකොටුවල සිටියද මරණය නුඹලාව වෙළා ගන්නේමය. තවද ඔවුනට කිසියම් යහපතක් අත්වූ විටදී 'මෙය අල්ලාහ්ගෙන්යැ'යි ඔවුහු කියති. ඔවුනට නපුරක් අත්වුවහොත් 'මෙය ඔබගෙන්යැ'යි ඔවුහු කියති. පවසන්න, 'සියල්ල අල්ලාහ්ගෙන්ය'. මෙම ජනතාවට ඔවුන් කිසිවක් තේරුම් ගැනීමටවත් ආසන්න නොවන තරමට කුමක් සිදුවී ඇත්ද?

مَآ اَصَابَكَ مِنْ حَسَنَةٍ فَمِنَ اللّٰهِ ۖ وَمَآ اَصَابَكَ مِنْ سَيِّئَةٍ فَمِنْ نَّفْسِكَ ۗ وَاَرْسَلْنٰكَ لِلنَّاسِ رَسُوْلًا ۗ وَكَفٰى بِاللّٰهِ شَهِيْدًا ﴿٨٠﴾

80. කවර හෝ යහපතක් ඔබ වෙතට පැමිණියේද එය අල්ලාහ්ගෙන්ය. තවද ඔබට කවර හෝ අයහපතක් අත්වුයේද එය ඔබගෙන්මය. තවද මිනිස් වර්ගයා වෙතට දූතයෙකු වශයෙන් අපි ඔබව එවා ඇත්තෙමු. තවද සාක්ෂිකරුවෙකු වශයෙන් අල්ලාහ් ප්‍රමාණවත්ය.

مَنْ يُّطِعِ الرَّسُوْلَ فَقَدْ اَطَاعَ اللّٰهَ ۚ وَمَنْ

81. කවුරුන් හෝ දූතයාණන්ට කීකරු වන්නේද ඇත්තෙන්ම අල්ලාහ්ටද

تَوَلّٰى فَمَآ اَرْسَلْنٰكَ عَلَيْهِمْ حَفِيْظًا ﴿٨١﴾

කීකරු වන්නේය. තවද කවුරුන් හෝ පිටුපෑවේ ද, එවිට ඔවුන්ව රැකබලාගන්නෙකු ලෙස අපි ඔබව නොඑව්වෙමු.

وَيَقُوْلُوْنَ طَاعَةٌ ۖ فَاِذَا بَرَزُوْا مِنْ عِنْدِكَ بَيَّتَ طَآئِفَةٌ مِّنْهُمْ غَيْرَ الَّذِىْ تَقُوْلُ ؕ وَاللّٰهُ يَكْتُبُ مَا يُبَيِّتُوْنَ ۚ فَاَعْرِضْ عَنْهُمْ وَتَوَكَّلْ عَلَى اللّٰهِ ؕ وَكَفٰى بِاللّٰهِ وَكِيْلًا ﴿٨٢﴾

82. තවද 'කීකරුභාවය (අපගේ මාර්ගෝපදේශක ප්‍රතිපත්තිය)'යි ඔවුහු කියති. එහෙත් ඔවුන් ඔබ වෙතින් ඉවත්ව ගිය කල්හි, ඔවුන්ගෙන් පිරිසක් ඔබ පැවසූ දෙයට එරෙහිව කුටඋපායෙහි යෙදමින් රාත්‍රිය ගත කරන්නෙහුය. රාත්‍රියෙහිදී ඔවුන් යොදන ඕනෑම කුටඋපායක් අල්ලාහ් සටහන් කර ගන්නේය. එබැවින් ඔවුන්ගෙන් ඉවත හැරෙනු. තවද අල්ලාහ් කෙරෙහි (ඔබගේ) විශ්වාසය තබනු. තවද ආරක්ෂකයෙකු ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය.

اَفَلَا يَتَدَبَّرُوْنَ الْقُرْاٰنَ ؕ وَلَوْ كَانَ مِنْ عِنْدِ غَيْرِ اللّٰهِ لَوَجَدُوْا فِيْهِ اخْتِلَافًا كَثِيْرًا ﴿٨٣﴾

*83. එසේනම්, ඔවුහු කුර්ආනය ගැඹුරින් මෙනෙහි නොකරන්නෙහුද? එය අල්ලාහ් හැර අන් අයෙකුගෙන් වූයේ නම් ඔවුන්ට නිසැකවම එහි බොහෝ නොඑකඟතාවයන් දකින්න තිබුණි.

وَاِذَا جَآءَهُمْ اَمْرٌ مِّنَ الْاَمْنِ اَوِ الْخَوْفِ اَذَاعُوْا بِهٖ ؕ وَلَوْ رَدُّوْهُ اِلَى الرَّسُوْلِ وَاِلٰٓى اُولِى الْاَمْرِ مِنْهُمْ لَعَلِمَهُ الَّذِيْنَ يَسْتَنْۢبِطُوْنَهٗ مِنْهُمْ ؕ

*84. තවද සාමය හෝ භීතිය පිළිබඳ යම් ආරංචියක් ඔවුන් වෙත පැමිණි කල්හි ඔවුහු එය පතුරුවා හරින්නෝය. එහෙත් ඔවුන් එය දූතයාණන් වෙත හෝ ඔවුන්ගේ බලධාරීන් වෙත යොමු කළේ නම්, ඔවුන්ගෙන් එම සත්‍ය තෝරාගත හැකි අය එය වටහා ගන්නට තිබුණි. තවද අල්ලාහ්ගේ අනුග්‍රහයද, ඔහුගේ දයාවද නුඹලා වෙත

* සටහන. 83: කුර්ආනයේ 'ඉක්:තිලාෆන් කසිරන්'( اِخْتِلَافًا كَثِيْرًا ) (බොහෝ නොඑකඟතාවයන්) යන යෙදුම ඇත්තෙන්ම 'පරස්පර විරෝධත්වයක්' යන තේරුම පෙන්නුම් කරයි. එනම් අල්ලාහ් හැර අන් කිසිවෙකු ශුද්ධ කර්ආනයෙහි ලේඛකයා වූයේ නම්, ජනතාව එහි පරස්පර විරෝධත්වයක් දකිනු ඇත. මේ හා සමාන යෙදුමක් විශ්වයෙහි නිර්මාණය පිළිබඳව 67:4 (අල්-මුල්ක්) හි සඳහන් වේ. එනම් අල්ලාහ්ගේ කාර්යයන්හි කිසිඳු දෝෂයක් පරස්පර විරෝධිතාවයක් නොමැති බව එමගින් ප්‍රකාශිත වේ.

* සටහන. 84: මෙම පරිවර්තනය දූතයාණන් සහ ඔවුනතර නිලතලයෙහි සිටින අය හට මුළුමනින්ම හරි තිරණයක් ගැනීමේ හැකියාවක් නොමැති බවද, ඔවුනතර සිටින මනාව විනිශ්වය කිරීමේ හැකියාවක් ඇති අයහට පමණක් මෙහි සත්‍යතාවය සොයාගත හැකි බවද ඒත්තු ගන්වයි. නමුත් මෙම දෝෂය නිවැරදි කරන එමෙන්ම එම වාර්තාව මෙනෙහි කොට පරීක්ෂණයට භාජනය කිරීමෙන් අනතුරුව සත්‍යය සොයාගැනීමේ හැකියාව ඔවුන් සැම දෙනාටම තිබූ බව ඒත්තු ගන්වන පරිවර්ථනයක් අපි ඉදිරිපත් කරමු: "සාමයෙහි හෝ අනතුරු ඇඟවීමෙහි කරුණක් (පිළිබඳව කටකතාවක්) ඔවුන්ට ලැබුන විටදී ඔවුහු එය

වලව් ලා ෆද්ලුල්ලාහි අලෛකුම් ව රහ්මතුහු — නොවන්නට, කිහිප දෙනෙකු හැර නුඹලා ෂෙයිතාන්ව අනුගමනය කරන්නට තිබුණි.

وَلَوۡلَا فَضۡلُ اللّٰهِ عَلَيۡكُمۡ وَرَحۡمَتُهٗ لَاتَّبَعۡتُمُ الشَّيۡطٰنَ اِلَّا قَلِيۡلًا ﴿۸۴﴾

85. එබැවින්, අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් කරනු. ඔබ ගැන පමණක් වගකීම ඔබ බාරයෙහි ඇත. තවද විශ්වාසිතයින්ව දිරිගන්වන්න. එය අල්ලාහ් අවිශ්වාසිතයින්ගේ බලය වළක්වනු පිණිස විය හැක. එමෙන්ම අල්ලාහ් බලයෙහි ඉතා ශක්තිමත්ය. තවද ඔහු දඬුවම් දීමෙහිද ඉතා ශක්තිමත්ය.

فَقَاتِلۡ فِىۡ سَبِيۡلِ اللّٰهِ‌ۚ لَا تُكَلَّفُ اِلَّا نَفۡسَكَ‌ وَحَرِّضِ الۡمُؤۡمِنِيۡنَ‌ۚ عَسَى اللّٰهُ اَنۡ يَّكُفَّ بَاۡسَ الَّذِيۡنَ كَفَرُوۡا‌ ؕ وَاللّٰهُ اَشَدُّ بَاۡسًا وَّاَشَدُّ تَـنۡكِيۡلًا ﴿۸۵﴾

86. කවුරුන් හෝ ධාර්මිෂ්ඨ මැදිහත්වීමක් කරන්නේද ඔහුට එයින් කොටසක් ඇත. තවද කවුරුන් හෝ නපුරු මැදිහත්වීමක් කරන්නේද ඔහුටද එහි (නපුරු ප්‍රතිවිපාකයෙන්) එවැනිම කොටසක් ඇත. තවද අල්ලාහ් සියළු දේ කෙරෙහි බලසම්පන්නය.

مَنۡ يَّشۡفَعۡ شَفَاعَةً حَسَنَةً يَّكُنۡ لَّهٗ نَصِيۡبٌ مِّنۡهَا‌ ۚ وَمَنۡ يَّشۡفَعۡ شَفَاعَةً سَيِّئَةً يَّكُنۡ لَّهٗ كِفۡلٌ مِّنۡهَا‌ ؕ وَكَانَ اللّٰهُ عَلٰى كُلِّ شَىۡءٍ مُّقِيۡتًا ﴿۸۶﴾

*87. තවද නුඹලාට ප්‍රාර්ථනාවකින් ආචාර කරනු ලැබූ විටදී, නුඹලාද ඊටත් වඩා යහපත් ප්‍රාර්ථනාවකින් ආචාර කරනු. නැතහොත් (අවම වශයෙන්) එයම ආපසු පවසනු. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේ ගණන් ගන්නේය.

وَاِذَا حُيِّيۡتُمۡ بِتَحِيَّةٍ فَحَيُّوۡا بِاَحۡسَنَ مِنۡهَاۤ اَوۡ رُدُّوۡهَا ‌ؕ اِنَّ اللّٰهَ كَانَ عَلٰى كُلِّ شَىۡءٍ حَسِيۡبًا ﴿۸۷﴾

88. අල්ලාහ්, ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙකු නොමැත. නිසැකවම ඔහු නුඹලාව පුනරුත්ථාන දිනය දක්වා එක්රැස් කරමින් (සිටිනු ඇත). ඒ ගැන කිසිඳු සැකයක් නොමැත. තවද කථනයෙහි අල්ලාහ්ට වඩා සත්‍යවාදී වන්නේ කවරෙක්ද?

اَللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ‌ ؕ لَيَجۡمَعَنَّكُمۡ اِلٰى يَوۡمِ الۡقِيٰمَةِ لَا رَيۡبَ فِيۡهِ‌ ؕ وَمَنۡ اَصۡدَقُ مِنَ اللّٰهِ حَدِيۡثًا ﴿۸۸﴾

පතුරුවා හරින්නෝය. එහෙත් ඔවුන් එය දූතයාණන් වෙත හෝ ඔවුන් අතර නිලතලවල සිටින අය වෙත යොමු කළේ නම්, නියතවශයෙන්ම ඔවුනතර සිටින අයගෙන් එම කරුණ මනාව පරීක්ෂා කරන අයට එහි සත්‍යතාවය වටහා ගන්නට හැකි වේ."

* සටහන. 87: මෙම ජේදයෙහි අඩංගු අනුසාශනාවට පුළුල් යෙදුමක් තිබියදී මෙහි පරිවර්ථනය මෙම ජේදයෙහි යෙදුම වාචිකව ආචාර කිරීමට පමණක් සීමා කරයි. ඇත්තෙන්ම එය වාචික ආචාර කිරීමට පමණක් සීමා නොවන අතර එය සියළු වර්ගයේ තෑගි බෝගද ඉතා ත්‍යාගශීලි ලෙස හුවමාරු කළ යුතු බවද හැඟේ.

89. කුහකයින් සම්බන්ධයෙන් දෙපිරිසක් ලෙස භේදවීමට නුඹලාට කුමක් සිදුවිද? තවද ඔවුන් ඉපැයූ දේ හේතුවෙන් අල්ලාහ් ඔවුන්ව පරාජය කළේය. අල්ලාහ් විනාශයට පත්කළ අයව නුඹලා යහමග යවන්නට කැමැති වන්නේද? තවද අල්ලාහ් විනාශයට පත් කරන්නාවූ අයට කිසිම මගක් ඔබ නොදකින්නෙහිය.

فَمَا لَكُمْ فِي الْمُنٰفِقِيْنَ فِئَتَيْنِ وَاللّٰهُ
اَرْكَسَهُمْ بِمَا كَسَبُوْا ؕ اَتُرِيْدُوْنَ اَنْ
تَهْدُوْا مَنْ اَضَلَّ اللّٰهُ ؕ وَمَنْ يُّضْلِلِ اللّٰهُ
فَلَنْ تَجِدَ لَهٗ سَبِيْلًا ﴿٨٩﴾

90. ඔවුන් අවිශ්වාස කළාක් මෙන් නුඹලාද අවිශ්වාස කරමින්, නුඹලා සහ ඔවුන් එක හා සමාන වීම ඔවුහු කැමැති වෙති. එබැවින් ඔවුන් අල්ලාහ්ගේ මාර්ගයෙහි සංක්‍රමණය කරන තෙක් නුඹලා ඔවුනතරෙන් කිසිවෙකුත් මිතුරන් ලෙස නොගනු. තවද ඔවුන් ඉවත හැරුනේ නම්, ඔවුන්ව කොතැනක දුටුවත් ඔවුන්ව හසුකර ගෙන ඔවුන් ඝාතනය කරනු. තවද ඔවුන්ගෙන් (කිසිවෙකුව) මිතුරෙකු ලෙස හෝ උදව්කරුවෙකු ලෙස හෝ නොගනු.

وَدُّوْا لَوْ تَكْفُرُوْنَ كَمَا كَفَرُوْا
فَتَكُوْنُوْنَ سَوَآءً فَلَا تَتَّخِذُوْا مِنْهُمْ
اَوْلِيَآءَ حَتّٰى يُهَاجِرُوْا فِيْ سَبِيْلِ اللّٰهِ ؕ
فَاِنْ تَوَلَّوْا فَخُذُوْهُمْ وَاقْتُلُوْهُمْ حَيْثُ
وَجَدْتُّمُوْهُمْ ۪ وَلَا تَتَّخِذُوْا مِنْهُمْ
وَلِيًّا وَّلَا نَصِيْرًا ۙ﴿٩٠﴾

91. එහෙත් නුඹලා සමඟ ගිවිසුමක් ඇති කරගත් ජනතාව හා බැඳුන අය හෝ නුඹලා සමඟ සටන් කිරීමේදී හෝ තමන්ගේම ජනතාව සමඟ සටන් කිරීමේදී හෝ ඔවුන්ගේ හදවත් හැකිලී ගොස් නුඹලා වෙත පැමිණි අයද හැරෙන්නටය. තවද අල්ලාහ් කැමැති වූයේ නම් නුඹලාට වඩා ඔවුන්ට බලය දෙන්නට තිබුණි. එවිට නියතවශයෙන්ම ඔවුහු නුඹලා සමඟ සටන් කරන්නට තිබුණි. එමෙන්ම ඔවුන් නුඹලාගෙන් වෙන්වී තවද නුඹලා සමඟ සටන් නොකළේ නම්, තවද නුඹලා වෙත සාමය සඳහා ඉල්ලීමක් කළේ නම් එවිට (සිහි තබාගනු) ඔවුන්ට එරෙහිව කිසිඳු (ආක්‍රමණයකට) අල්ලාහ් නුඹලාට අනුමැතිය දී නොමැත.

اِلَّا الَّذِيْنَ يَصِلُوْنَ اِلٰى قَوْمٍۢ بَيْنَكُمْ
وَبَيْنَهُمْ مِّيْثَاقٌ اَوْ جَآءُوْكُمْ حَصِرَتْ
صُدُوْرُهُمْ اَنْ يُّقَاتِلُوْكُمْ اَوْ يُقَاتِلُوْا
قَوْمَهُمْ ؕ وَلَوْ شَآءَ اللّٰهُ لَسَلَّطَهُمْ
عَلَيْكُمْ فَلَقٰتَلُوْكُمْ ۚ فَاِنِ اعْتَزَلُوْكُمْ
فَلَمْ يُقَاتِلُوْكُمْ وَاَلْقَوْا اِلَيْكُمُ السَّلَمَ ۙ
فَمَا جَعَلَ اللّٰهُ لَكُمْ عَلَيْهِمْ سَبِيْلًا ﴿٩١﴾

92. නුඹලාගෙන් ආරක්ෂාවීමටද, ඔවුන්ගේම ජනතාවගෙන්

سَتَجِدُوْنَ اٰخَرِيْنَ يُرِيْدُوْنَ اَنْ

يَأْمَنُوكُمْ وَيَأْمَنُوا قَوْمَهُمْ ۚ كُلَّمَا رُدُّوا
إِلَى الْفِتْنَةِ أُرْكِسُوا فِيهَا ۚ فَإِنْ لَمْ
يَعْتَزِلُوكُمْ وَيُلْقُوا إِلَيْكُمُ السَّلَمَ
وَيَكُفُّوا أَيْدِيَهُمْ فَخُذُوهُمْ وَاقْتُلُوهُمْ
حَيْثُ ثَقِفْتُمُوهُمْ ۚ وَأُولَٰئِكُمْ جَعَلْنَا
لَكُمْ عَلَيْهِمْ سُلْطَانًا مُبِينًا ﴿٩٢﴾

ආරක්ෂාවීමටද කැමැති තවත් අයද නුඹලා දකිනු ඇත. ඔවුන්ව කලහකාරීත්වයට නැවත යොමු කරවනු ලබන ඕනෑම විටෙකදී ඔවුහු එකහෙලාම එයට යොමුවනු ඇත. එබැවින් ඔවුන් නුඹලාගෙන් ඉවත් නොවුයේ නම් හෝ නුඹලා වෙත සාමය සඳහා නොපැමිණෙන්නේ නම් හෝ ඔවුන්ගේ දෑත් වළක්වා නොගන්නේ නම්, ඔවුන්ව කොතැනක දුටුවත් ඔවුන්ව හසුකරගෙන ඝාතනය කරනු. මෙවැන්නන්ට එරෙහිව අපි නුඹලාට පැහැදිලි බලය දී ඇත්තෙමු.

وَمَا كَانَ لِمُؤْمِنٍ أَنْ يَقْتُلَ مُؤْمِنًا إِلَّا
خَطَأً ۚ وَمَنْ قَتَلَ مُؤْمِنًا خَطَأً فَتَحْرِيرُ
رَقَبَةٍ مُؤْمِنَةٍ وَدِيَةٌ مُسَلَّمَةٌ إِلَىٰ أَهْلِهِ
إِلَّا أَنْ يَصَّدَّقُوا ۚ فَإِنْ كَانَ مِنْ قَوْمٍ
عَدُوٍّ لَكُمْ وَهُوَ مُؤْمِنٌ فَتَحْرِيرُ رَقَبَةٍ
مُؤْمِنَةٍ ۖ وَإِنْ كَانَ مِنْ قَوْمٍ بَيْنَكُمْ
وَبَيْنَهُمْ مِيثَاقٌ فَدِيَةٌ مُسَلَّمَةٌ إِلَىٰ أَهْلِهِ
وَتَحْرِيرُ رَقَبَةٍ مُؤْمِنَةٍ ۖ فَمَنْ لَمْ يَجِدْ
فَصِيَامُ شَهْرَيْنِ مُتَتَابِعَيْنِ تَوْبَةً مِنَ
اللَّهِ ۗ وَكَانَ اللَّهُ عَلِيمًا حَكِيمًا ﴿٩٣﴾

93. අතපසුවීමකින් සිදුවුවා මිස විශ්වාසිතයෙකු තවත් විශ්වාසිතයෙකුව ඝාතනය කිරීම ඔහුට යුතු නොවේ. තවද කෙනෙකු විශ්වාසිතයෙකුව අතපසුවීමකින් ඝාතනය කළේ නම් ඔහු, විශ්වාසිත වහලෙකු නිදහස් කළ යුතු අතර (මියගිය) ඔහුගේ උරුමක්කාරයින් හට වන්දි මුදලක් (ගෙවිය යුතු)වේ. ඔවුන් එය දානයක් ලෙස අත්හැරියොත් මිස. නමුත් (මරණ ලද තැනැත්තා) ඔහු නුඹලාගේ විරුද්ධවාදීන් ගෙන් කෙනෙකු වී, විශ්වාසිතයෙකුද වුයේ නම්, (වැරදිකරු) විසින් විශ්වාසිත වහලෙකු මුදා හැරිය යුතුය. එමෙන්ම ඔහු නුඹලා සමඟ ගිවිසුමකට බැඳි ජනතාවකට අයත් කෙනෙකු නම්, ඔහුගේ උරුමක්කාරයින්ට වන්දි මුදල දිය යුතු අතර විශ්වාසිත වහලෙකුද මුදා හැරිය යුතුයි. නමුත් කවරෙකුට හෝ (වහලෙකු) නොලැබුනේ නම්, එවිට ඔහු නොකඩවා දෙමසක් උපවාස කළ යුතුය. මෙය අල්ලාහ් විසින් නියම කරන ලද පව් ක්ෂමාව අයැදීමේ මගකි. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නය.

وَمَنْ يَقْتُلْ مُؤْمِنًا مُتَعَمِّدًا فَجَزَاؤُهُ

94. තවද කවුරුන් හෝ විශ්වාසිතයෙකුව ඕනෑකමින් ඝාතනය

جَهَنَّمُ خٰلِدًا فِيْهَا وَغَضِبَ اللّٰهُ عَلَيْهِ وَلَعَنَهٗ وَاَعَدَّ لَهٗ عَذَابًا عَظِيْمًا ﴿٩٤﴾

කළේ නම්, ඔහුගේ තිළිණය නිරය වේ. ඔහු එහිම වෙසෙනු ඇත. තවද අල්ලාහ් ඔහු සමඟ කෝපයට පත්වන්නේය. තවද ඔහුට ශාප කරන්නේය. එමෙන්ම ඔහුට මහත් වූ දඬුවමක්ද සූදානම් කරනු ඇත.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِذَا ضَرَبْتُمْ فِيْ سَبِيْلِ اللّٰهِ فَتَبَيَّنُوْا وَلَا تَقُوْلُوْا لِمَنْ اَلْقٰۤى اِلَيْكُمُ السَّلٰمَ لَسْتَ مُؤْمِنًا ۚ تَبْتَغُوْنَ عَرَضَ الْحَيٰوةِ الدُّنْيَا ۫ فَعِنْدَ اللّٰهِ مَغَانِمُ كَثِيْرَةٌ ؕ كَذٰلِكَ كُنْتُمْ مِّنْ قَبْلُ فَمَنَّ اللّٰهُ عَلَيْكُمْ فَتَبَيَّنُوْا ؕ اِنَّ اللّٰهَ كَانَ بِمَا تَعْمَلُوْنَ خَبِيْرًا ﴿٩٥﴾

95. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ්ගේ මාර්ගයෙහි පෙරට යන විටදී මනා ලෙස සොයා බලනු. තවද සාමයෙහි ආචාරයෙන් නුඹලාට ආචාර කරන කවරෙකුට හෝ 'නුඹ විශ්වාසිතයකු නොවේයැ'යි නුඹලා නොකියනු. නුඹලා මෙලොව ජීවිතයෙහි යහපත් දේවල් සොයන්නෙහුය. නමුත් අල්ලාහ් වෙත යහපත් දේවල් බහුලව ඇත. මීට පෙරද නුඹලාද එසේ වූවෙහුය. එහෙත් අල්ලාහ් නුඹලාට ඔහුගේ (විශේෂ) අනුග්‍රහය පිරිනැමුවේය. එබැවින් නුඹලා මනා ලෙස සොයා බලනු. නියතවශයෙන්ම නුඹලා කරන දේ ගැන අල්ලාහ් මැනැවින් දන්නේය.

لَا يَسْتَوِي الْقٰعِدُوْنَ مِنَ الْمُؤْمِنِيْنَ غَيْرُ اُولِي الضَّرَرِ وَالْمُجٰهِدُوْنَ فِيْ سَبِيْلِ اللّٰهِ بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ ؕ فَضَّلَ اللّٰهُ الْمُجٰهِدِيْنَ بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ عَلَى الْقٰعِدِيْنَ دَرَجَةً ؕ وَكُلًّا وَّعَدَ اللّٰهُ الْحُسْنٰى ؕ وَفَضَّلَ اللّٰهُ الْمُجٰهِدِيْنَ عَلَى الْقٰعِدِيْنَ اَجْرًا عَظِيْمًا ۙ ﴿٩٦﴾

96. විශ්වාසිත අය අතරින්, ආබාධිතයින් හැරෙන්නට, (නිකරුණේ) සිටින්නන්, අල්ලාහ්ගේ මාර්ගයෙහි තමන්ගේ ධනය හා තමන්ගේ ජීවිත මගින් පරිශ්‍රමයෙහි යෙදෙන්නන්ට සමාන නොවන්නෝය. අල්ලාහ්ගේ මාර්ගයෙහි තමන්ගේ ධනය හා තමන්ගේ ජීවිත මගින් පරිශ්‍රමයෙහි යෙදෙන්නන්ව, (නිකරුණේ) සිටින්නන්ට වඩා අල්ලාහ් තරාතිරමෙන් උසස්කොට ඇත. එමෙන්ම අල්ලාහ් සෑම අයෙකුටම යහපත පොරොන්දුවී ඇත. අල්ලාහ් පරිශ්‍රමයෙහි යෙදෙන්නන්ව, (නිකරුණේ) සිටින්නන්ට වඩා මහත්වූ තිළිණයකින් උසස් කොට ඇත.

دَرَجٰتٍ مِّنْهُ وَمَغْفِرَةً وَّرَحْمَةً ؕ وَكَانَ اللّٰهُ غَفُوْرًا رَّحِيْمًا ﴿٩٧﴾ ع ١٣/١٠

97. (එනම්) ඔහු වෙතින් (පිරිනමන ලද) විවිධ මට්ටමේ ශ්‍රේෂ්ඨත්වයද, එමෙන්ම විශේෂිතවූ ක්ෂමාවද, දයාවද (මගින්ය). අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

98. ඇත්තෙන්ම ඔවුන් විසින්ම ඔවුන්ගේ ආත්මයන්ට වැරදි කරමින් සිටින විටදී සුරදූතයින් ඔවුන්ට මරණය පමුණුවන කල්හි (ඔවුන් වෙත) 'නුඹලා කුමක් පසුපසද,'යි ඔවුහු (සුරදූතයින්) අසනු ඇත. 'අපි පොළොවෙහි දුබලයන් ලෙස සලකන ලද්දෙමු'යි ඔවුහු පිළිතුරු දෙන්නෝය. 'අල්ලාහ්ගේ භූමිය නුඹලාට සංක්‍රමණය කිරීමට විශාල නොවූයේද,'යි ඔවුහු කියනු ඇත. නිරය වාසස්ථානය වන්නේ ඔවුන්ටය. එය නපුරු ස්ථානයකි.

إِنَّ الَّذِينَ تَوَفَّاهُمُ الْمَلَائِكَةُ ظَالِمِي أَنفُسِهِمْ قَالُوا فِيمَ كُنتُمْ ۖ قَالُوا كُنَّا مُسْتَضْعَفِينَ فِي الْأَرْضِ ۚ قَالُوا أَلَمْ تَكُنْ أَرْضُ اللَّهِ وَاسِعَةً فَتُهَاجِرُوا فِيهَا ۚ فَأُولَٰئِكَ مَأْوَاهُمْ جَهَنَّمُ ۖ وَسَاءَتْ مَصِيرًا ﴿٩٨﴾

99. කිසිඳු සැළසුමක් කරගත නොහැකි හෝ කිසිඳු මගක් සොයාගත නොහැකි, පුරුෂයින්, ස්ත්‍රීන් හා දරුවන් අතර සිටින දුබලයින් හැරය.

إِلَّا الْمُسْتَضْعَفِينَ مِنَ الرِّجَالِ وَالنِّسَاءِ وَالْوِلْدَانِ لَا يَسْتَطِيعُونَ حِيلَةً وَلَا يَهْتَدُونَ سَبِيلًا ﴿٩٩﴾

100. මෙවැනි අය ගත් කළ, ඔවුන්ගේ පාපයන් අල්ලාහ් විසින් මකා දැමිය හැක. මන්ද අල්ලාහ් පාපයන් මකා දමන්නාද, අතිශයින් ක්ෂමාන්විතද වන බැවිනි.

فَأُولَٰئِكَ عَسَى اللَّهُ أَن يَعْفُوَ عَنْهُمْ ۚ وَكَانَ اللَّهُ عَفُوًّا غَفُورًا ﴿١٠٠﴾

*101. තවද කවුරුන්හෝ අල්ලාහ්ගේ මාර්ගයෙහි තමාගේ දේශයෙන් සංක්‍රමණය කරන්නේද, ඔහු පොළොවෙහි බහුලවූ අභය ස්ථානයක්ද, සමෘද්ධියද ලබන්නේය. තවද කවුරුන්හෝ අල්ලාහ්ගේ මාර්ගයෙහිද, ඔහුගේ දූතයාණන්ගේ මාර්ගයෙහිද ඔහුගේ නිවස හැර, සංක්‍රමණය කරන්නේද, එවිට ඔහුට මරණය පැමිණියහොත් ඔහුගේ තිළිණ අල්ලාහ් වෙතය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَمَن يُهَاجِرْ فِي سَبِيلِ اللَّهِ يَجِدْ فِي الْأَرْضِ مُرَاغَمًا كَثِيرًا وَسَعَةً ۚ وَمَن يَخْرُجْ مِن بَيْتِهِ مُهَاجِرًا إِلَى اللَّهِ وَرَسُولِهِ ثُمَّ يُدْرِكْهُ الْمَوْتُ فَقَدْ وَقَعَ أَجْرُهُ عَلَى اللَّهِ ۗ وَكَانَ اللَّهُ غَفُورًا رَّحِيمًا ﴿١٠١﴾

* සටහන. 101: 'ෆි සබීලිල්ලාහ්'( فِي سَبِيلِ اللَّهِ ) යන අරාබි වචනයෙහි අරුත වනුයේ අල්ලාහ් වෙනුවෙන් හෝ අල්ලාහ්ගේ මාර්ගයෙහි යන්න වේ.

102. තවද නුඹලා පොළොවෙහි ගමනක යෙදී සිටින විටකදී, අවිශ්වාසිතයින් නුඹලාට හිංසා කරනු ඇතැයි නුඹලා බියවන්නේ නම් නමස්කාරය කෙටිකර ගැනීම නුඹලා කෙරෙහි පවක් නොවන්නේය. ඇත්තෙන්ම අවිශ්වාසිතයින් නුඹලාට ප්‍රකට සතුරන් වන්නෝය.

وَاِذَا ضَرَبۡتُمۡ فِى الۡاَرۡضِ فَلَيۡسَ
عَلَيۡكُمۡ جُنَاحٌ اَنۡ تَقۡصُرُوۡا مِنَ الصَّلٰوةِ ‌ۖ
اِنۡ خِفۡتُمۡ اَنۡ يَّفۡتِنَكُمُ الَّذِيۡنَ كَفَرُوۡا‌ ؕ
اِنَّ الۡكٰفِرِيۡنَ كَانُوۡا لَـكُمۡ عَدُوًّا مُّبِيۡنًا ﴿۱۰۱﴾

103. තවද ඔබ ඔවුනතරෙහි හිඳ, ඔවුනට නමස්කාරය මෙහෙයවන විටදී ඔවුන්ගෙන් එක් කණ්ඩායමක් ඔබ සමඟ නැගිට සිටගනිමින් තමන්ගේ අවිආයුධ ගනිත්වා. තවද ඔවුන් (සුජුද්) නළල බිම තබා නමස්කාරය ඉටු කළායින් පසුව, ඔවුන් ඔබගේ පිටුපසට ගොස්, මෙතෙක් නමස්කාරයෙහි නොයෙදුණ තවත් කණ්ඩායමක් ඉදිරියට පැමිණ ඔබ සමඟ නමස්කාරය කරත්වා. එමෙන්ම මොවුන්ද ඔවුන්ගේ ආරක්ෂක විධිවිධාන සලසාගනිමින් ඔවුන්ගේ අවි ආයුධ ගනිත්වා. නුඹලා නුඹලාගේ අවිආයුධ සහ නුඹලාගේ බඩුබාහිර ගැන නොසැළකිලිමත් වන්නේ නම්, එක්වරම නුඹලා වෙත කඩා පැනීමට අවිශ්වාසිතයින් කැමැති වන්නෝය. තවද වර්ෂාව හේතු කොටගෙන නුඹලා අපහසුතාවයට පත්වී ඇත්නම් හෝ නුඹලා අසනීප වී ඇත්නම් හෝ නුඹලාගේ අවිආයුධ පසෙක තැබීමෙන් නුඹලා කෙරෙහි කිසිඳු වරදක් නොමැත. එහෙත් නුඹලා (සෑමවිටම) නුඹලාගේ ආරක්ෂාව සළසා ගත යුතුය. නියතවශයෙන්ම අල්ලාහ් අවිශ්වාසිතයින් සඳහා නින්දිතවූ දඬුවමක් පිළියෙල කර ඇත.

وَاِذَا كُنۡتَ فِيۡهِمۡ فَاَقَمۡتَ لَهُمُ الصَّلٰوةَ
فَلۡتَقُمۡ طَآئِفَةٌ مِّنۡهُمۡ مَّعَكَ وَلۡيَاۡخُذُوۡۤا
اَسۡلِحَتَهُمۡ فَاِذَا سَجَدُوۡا فَلۡيَكُوۡنُوۡا مِنۡ
وَّرَآئِكُمۡ وَلۡتَاۡتِ طَآئِفَةٌ اُخۡرٰى لَمۡ
يُصَلُّوۡا فَلۡيُصَلُّوۡا مَعَكَ وَلۡيَاۡخُذُوۡا
حِذۡرَهُمۡ وَاَسۡلِحَتَهُمۡ‌ ۚ وَدَّ الَّذِيۡنَ كَفَرُوۡا
لَوۡ تَغۡفُلُوۡنَ عَنۡ اَسۡلِحَتِكُمۡ وَاَمۡتِعَتِكُمۡ
فَيَمِيۡلُوۡنَ عَلَيۡكُمۡ مَّيۡلَةً وَّاحِدَةً‌ ؕ وَلَا
جُنَاحَ عَلَيۡكُمۡ اِنۡ كَانَ بِكُمۡ اَذًى مِّنۡ
مَّطَرٍ اَوۡ كُنۡتُمۡ مَّرۡضٰۤى اَنۡ تَضَعُوۡۤا
اَسۡلِحَتَكُمۡ‌ ۚ وَخُذُوۡا حِذۡرَكُمۡ‌ ؕ اِنَّ اللّٰهَ
اَعَدَّ لِلۡكٰفِرِيۡنَ عَذَابًا مُّهِيۡنًا ﴿۱۰۲﴾

104. නුඹලා නැමදීම අවසන් කළ විට සිටගෙනද, හිඳගෙනද, ඇලවී සිටිමින්ද අල්ලාහ්ව සිහිපත් කරනු. පසුව නුඹලා (අනතුරෙන්) ආරක්ෂිත වූ කල්හි (නියමිත ආකාරයට) නැමදීමෙහි නිරතවනු. නිශ්චිතවම,

فَاِذَا قَضَيۡتُمُ الصَّلٰوةَ فَاذۡكُرُوا اللّٰهَ قِيٰمًا
وَّقُعُوۡدًا وَّعَلٰى جُنُوۡبِكُمۡ‌ ۚ فَاِذَا
اطۡمَاۡنَنۡتُمۡ فَاَقِيۡمُوا الصَّلٰوةَ‌ ۚ اِنَّ الصَّلٰوةَ

كَانَتْ عَلَى الْمُؤْمِنِينَ كِتَابًا مَّوْقُوتًا ﴿١٠٤﴾

නැමදීම, නියම කළ වේලාවන්හිදී (ඉටුකිරීමට) විශ්වාසිතයින්ට අණ කරන ලදි.

وَلَا تَهِنُوا فِي ابْتِغَاءِ الْقَوْمِ ۖ إِن تَكُونُوا تَأْلَمُونَ فَإِنَّهُمْ يَأْلَمُونَ كَمَا تَأْلَمُونَ ۖ وَتَرْجُونَ مِنَ اللَّهِ مَا لَا يَرْجُونَ ۗ وَكَانَ اللَّهُ عَلِيمًا حَكِيمًا ﴿١٠٥﴾ ع

105. තවද නුඹලා එම ජනතාව සොයා යෑමෙහි අලස නොවනු. නුඹලා විපතට පත්වන්නේ නම්, නුඹලා විපතට පත්වන පරිද්දෙන් ඔවුන්ද විපතට පත්වෙති. නමුත් ඔවුහු බලාපොරොත්තු නොවන දේ, නුඹලා අල්ලාහ්ගෙන් බලාපොරොත්තු වන්නෙහුය. අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

إِنَّا أَنزَلْنَا إِلَيْكَ الْكِتَابَ بِالْحَقِّ لِتَحْكُمَ بَيْنَ النَّاسِ بِمَا أَرَاكَ اللَّهُ ۚ وَلَا تَكُن لِّلْخَائِنِينَ خَصِيمًا ﴿١٠٦﴾

106. අල්ලාහ් ඔබට ඉගැන්වූ දැයින් මිනිසුන් අතර ඔබ විනිශ්චය කරනු පිණිස නියතවශයෙන්ම අපි සත්‍ය අඩංගු ග්‍රන්ථය ඔබ වෙත පහළ කළෙමු. තවද විශ්වාස ද්‍රෝහිවන්නන් වෙනුවෙන් ආයාචනා නොකරන්න.

وَاسْتَغْفِرِ اللَّهَ ۖ إِنَّ اللَّهَ كَانَ غَفُورًا رَّحِيمًا ﴿١٠٧﴾

107. තවද අල්ලාහ්ගෙන් සමාව අයැදිනු. නිසැකවම අල්ලාහ් අතිශයින්ම සමාන්විතය, දයාබරය.

وَلَا تُجَادِلْ عَنِ الَّذِينَ يَخْتَانُونَ أَنفُسَهُمْ ۚ إِنَّ اللَّهَ لَا يُحِبُّ مَن كَانَ خَوَّانًا أَثِيمًا ﴿١٠٨﴾

108. තවද තමන්ටම වංක වන්නවුන් වෙනුවෙන් ආයාචනා නොකරනු. නියතවශයෙන්ම ද්‍රෝහී මෙන්ම මහා පාපකාරී කෙනෙකුට අල්ලාහ් දයාව නොදක්වන්නේය.

يَسْتَخْفُونَ مِنَ النَّاسِ وَلَا يَسْتَخْفُونَ مِنَ اللَّهِ وَهُوَ مَعَهُمْ إِذْ يُبَيِّتُونَ مَا لَا يَرْضَىٰ مِنَ الْقَوْلِ ۚ وَكَانَ اللَّهُ بِمَا يَعْمَلُونَ مُحِيطًا ﴿١٠٩﴾

109. ඔවුහු මිනිසුන්ගෙන් සඟවන්නට තැත් කරති. එහෙත් ඔවුන්ට අල්ලාහ්ගෙන් සැඟවිය නොහැක. තවද ඔහු අනුමත නොකරන දේ පිළිබඳව කුමන්ත්‍රණය කරමින් ඔවුන් රාත්‍රිය ගත කරන විටද ඔහු ඔවුන් සමඟ සිටින්නේය. එමෙන්ම ඔවුන් කරන දේ අල්ලාහ් වටලා සිටින්නේය.

هَا أَنتُمْ هَٰؤُلَاءِ جَادَلْتُمْ عَنْهُمْ فِي الْحَيَاةِ

110. බලනු! මෙලොව ජීවිතයේදී ඔවුන් වෙනුවෙන් ආයාචනා කරන්නන්

الدُّنْيَا ۚ فَمَنْ يُّجَادِلُ اللّٰهَ عَنْهُمْ يَوْمَ الْقِيٰمَةِ اَمْ مَّنْ يَّكُوْنُ عَلَيْهِمْ وَكِيْلًا ﴿١١٠﴾

නුඹලාමය. එහෙත් පුනරුත්ථාන දිනයේදී ඔවුන් වෙනුවෙන් අල්ලාහ් වෙත ආයාචනා කරන්නේ කවුරුන්ද? නැතහොත් ඔවුන්ගේ භාරකරුවන් වන්නේ කවුරුන්ද?

وَمَنْ يَّعْمَلْ سُوْٓءًا اَوْ يَظْلِمْ نَفْسَهٗ ثُمَّ يَسْتَغْفِرِ اللّٰهَ يَجِدِ اللّٰهَ غَفُوْرًا رَّحِيْمًا ﴿١١١﴾

111. තවද කවුරුන්හෝ නපුරක් කර නැතහොත් ඔහුගේම ආත්මයට වැරදි කර, පසුව අල්ලාහ්ගෙන් ක්ෂමාව අයැද සිටින්නේ නම්, අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විත මෙන්ම දයාබර බව ඔහු (නිසැකවම) දකිනු ඇත.

وَمَنْ يَّكْسِبْ اِثْمًا فَاِنَّمَا يَكْسِبُهٗ عَلٰى نَفْسِهٖ ؕ وَكَانَ اللّٰهُ عَلِيْمًا حَكِيْمًا ﴿١١٢﴾

112. තවද කවුරුන්හෝ පවක් කරන්නේද, එය ඔහුගේම ආත්මයට එරෙහිව පමණක් කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

وَمَنْ يَّكْسِبْ خَطِيْٓـئَةً اَوْ اِثْمًا ثُمَّ يَرْمِ بِهٖ بَرِيْٓـئًا فَقَدِ احْتَمَلَ بُهْتَانًا وَّاِثْمًا مُّبِيْنًا ﴿١١٣﴾ ع

113. තවද කවුරුන්හෝ දෝෂයක් හෝ පාපයක් සිදුකොට, පසුව එය නිර්දෝෂී අයෙක් මත පටවන්නේ නම්, ඔහු නිශ්චිතවම මිථ්‍යාපවාදයෙහි සහ ප්‍රකට පාපයක (බර) උසුලන්නේය.

وَلَوْلَا فَضْلُ اللّٰهِ عَلَيْكَ وَرَحْمَتُهٗ لَهَمَّتْ طَّآئِفَةٌ مِّنْهُمْ اَنْ يُّضِلُّوْكَ ؕ وَمَا يُضِلُّوْنَ اِلَّآ اَنْفُسَهُمْ وَمَا يَضُرُّوْنَكَ مِنْ شَيْءٍ ؕ وَاَنْزَلَ اللّٰهُ عَلَيْكَ الْكِتٰبَ وَالْحِكْمَةَ وَعَلَّمَكَ مَا لَمْ تَكُنْ تَعْلَمُ ؕ وَكَانَ فَضْلُ اللّٰهِ عَلَيْكَ عَظِيْمًا ﴿١١٤﴾

114. තවද අල්ලාහ්ගේ වරප්‍රසාදය සහ දයාව ඔබ වෙත නොතිබෙන්නට, ඔවුන්ගෙන් පිරිසක් ඔබව නොමග යවන්නට අදිටන් කර ගත්තෝය. (නමුත් ඔහු ඔවුන්ගේ සැළැස්ම නිෂ්ඵල කළේය). ඇත්තෙන්ම ඔවුන් නොමග යවන්නේ තමන්වම මිස අන් කිසිවෙකු නොවන අතර, ඔබට හානියක් කිරීමට ඔවුන්ට කිසිසේත් නොහැක. අල්ලාහ් ඔබ වෙත ග්‍රන්ථයද ප්‍රඥාවද පහළ කර ඔබ නොදැන සිටි දේ ඔබට ඉගැන්වූයේය, තවද ඔබ වෙතවූ අල්ලාහ්ගේ වරප්‍රසාදය ඉමහත්ය.

لَا خَيْرَ فِيْ كَثِيْرٍ مِّنْ نَّجْوٰىهُمْ اِلَّا مَنْ

115. ඔවුන්ගේ රහස් සාකච්ඡාවලින් කිසිඳු යහපතක් ඇතිවන්නේ

أَمَرَ بِصَدَقَةٍ أَوْ مَعْرُوفٍ أَوْ إِصْلَاحٍ بَيْنَ النَّاسِ ۚ وَمَنْ يَفْعَلْ ذَٰلِكَ ابْتِغَاءَ مَرْضَاتِ اللَّهِ فَسَوْفَ نُؤْتِيهِ أَجْرًا عَظِيمًا ﴿١١٥﴾

නොමැත. දුගීන් වෙනුවෙන් වැයකිරීමට හෝ පොදුජන සුභසාධනය සඳහා ක්‍රියා කිරීමට හෝ ජනතාව අතර සමාදානය ඇතිකිරීමට හෝ ප්‍රතිසංස්කරණය කිරීමට ඔවුන් තීරණය කරන්නාවූ අවස්ථාව හැරය. තවද අල්ලාහ්ගේ සොම්නස පතමින් කවුරුන්හෝ එසේ කරන්නේද ඔහුට මහත්වූ තිළිණ අපි කඩිනමින්ම ලබා දෙන්නෙමු.

وَمَنْ يُشَاقِقِ الرَّسُولَ مِنْ بَعْدِ مَا تَبَيَّنَ لَهُ الْهُدَىٰ وَيَتَّبِعْ غَيْرَ سَبِيلِ الْمُؤْمِنِينَ نُوَلِّهِ مَا تَوَلَّىٰ وَنُصْلِهِ جَهَنَّمَ ۖ وَسَاءَتْ مَصِيرًا ﴿١١٦﴾

116. තවද යහ මග තමන්ට පැහැදිලි වූවායින් පසුව, දූතයාණන්ට විරුද්ධ වෙමින්, විශ්වාසිතයින්ගේ හැර අන් මගක් අනුගමනය කරන්නාවූ ඔහුව අපි ඔහු යන්නාවූ මගෙහි යන්නට හරින්නෙමු. තවද ඔහුව නිරයෙහි හෙලන්නෙමු. තවද එය ඉතා නපුරු ස්ථානයකි.

إِنَّ اللَّهَ لَا يَغْفِرُ أَنْ يُشْرَكَ بِهِ وَيَغْفِرُ مَا دُونَ ذَٰلِكَ لِمَنْ يَشَاءُ ۚ وَمَنْ يُشْرِكْ بِاللَّهِ فَقَدْ ضَلَّ ضَلَالًا بَعِيدًا ﴿١١٧﴾

117. නියතවශයෙන්ම අල්ලාහ්, ඔහුට සමාන තැබීම ක්ෂමා නොකරන්නේය. නමුත් එය හැරෙන්නට ඔහු අභිමත ඕනෑම කෙනෙකුට ඔහු ක්ෂමාව දෙන්නේය. තවද කවුරුන් හෝ අල්ලාහ්ට යම්කිසිවක් සමාන තබන්නේද ඇත්තෙන්ම ඔහු නොමගෙහි බොහෝ දුර ගොස් ඇත.

إِنْ يَدْعُونَ مِنْ دُونِهِ إِلَّا إِنَاثًا وَإِنْ يَدْعُونَ إِلَّا شَيْطَانًا مَرِيدًا ﴿١١٨﴾

118. ඔහු(අල්ලාහ්) හැර ඔවුන් යදින්නේ බොරු දේවතාවියන් මිස අන් කිසිවක් නොවේ. නමුත් ඔවුන් යදින්නේ කැරලිකාර ෂෙයිතාන්ව මිස අන් කිසිවෙකු නොවේ.

لَعَنَهُ اللَّهُ ۘ وَقَالَ لَأَتَّخِذَنَّ مِنْ عِبَادِكَ نَصِيبًا مَفْرُوضًا ﴿١١٩﴾

119. ඔහුට අල්ලාහ් ශාප කර ඇත. තවද ඔහු (මෙසේ) කීවේය, 'නියතවශයෙන්ම මම ඔබගේ දාසයින්ගෙන් නියමිත කොටසක් ගන්නෙමි.'

وَلَأُضِلَّنَّهُمْ وَلَأُمَنِّيَنَّهُمْ وَلَآمُرَنَّهُمْ فَلَيُبَتِّكُنَّ آذَانَ الْأَنْعَامِ وَلَآمُرَنَّهُمْ

120. 'තවද නිශ්චිතවම මම ඔවුන්ව නොමග යවන්නෙමි. ඔවුන් තුළ නිෂ්ඵල ආශාවන් ඇති කරවන්නෙමි. තවද නිසැකවම, ඔවුන් ගවසතුන්ගේ

කන් කපා හැරීමට මම ඔවුන්ට අණ කරන්නෙමි. තවද නිසැකවම මම ඔවුන්ට නියෝග කරන්නෙමි. එවිට ඔවුන් අල්ලාහ්ගේ මැවීම් වෙනස් කරනු ඇත'. තවද යමෙක් අල්ලාහ් හැර ෂෙයිතාන්ව මිතුරකු ලෙස ගන්නේද ඔහු නිසැකවම ප්‍රකට පරාජයක් අත් කර ගත්තේය.

فَلَيُغَيِّرُنَّ خَلْقَ اللَّهِ ۚ وَمَن يَتَّخِذِ الشَّيْطَانَ وَلِيًّا مِّن دُونِ اللَّهِ فَقَدْ خَسِرَ خُسْرَانًا مُّبِينًا ﴿١٢٠﴾

121. ඔහු ඔවුනට පොරොන්දු දෙමින් ඔවුන් තුල නිෂ්ඵල ආශාවන් වැඩි කරවන්නේය. තවද ෂෙයිතාන් නිෂ්ඵල දේවල් මිස අන් කිසිවක් ඔවුන්ට පොරොන්දු නොවන්නේය.

يَعِدُهُمْ وَيُمَنِّيهِمْ ۖ وَمَا يَعِدُهُمُ الشَّيْطَانُ إِلَّا غُرُورًا ﴿١٢١﴾

122. ඔවුන්ගේ වාසස්ථානය නිරය වන්නේය. තවද එයින් මිදීමට කිසිඳු මගක් ඔවුන් නොදකින්නෝය.

أُولَٰئِكَ مَأْوَاهُمْ جَهَنَّمُ وَلَا يَجِدُونَ عَنْهَا مَحِيصًا ﴿١٢٢﴾

123. එහෙත් විශ්වාස කර, යහපත් ක්‍රියා කරන්නන්ව අපි, එහි යටින් ගලාබස්නා ගංගාවලින් යුත් උද්‍යානයන්හි ඇතුළු කරන්නෙමු. ඔවුහු ඒවායෙහි සදාකල්හිම වෙසෙන්නෝය. (එය) අල්ලාහ්ගේ සත්‍යය පොරොන්දුවකි. තවද අල්ලාහ්ට වඩා සත්‍යවාදී විය හැක්කේ කවරෙකුගේ වදනද?

وَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ سَنُدْخِلُهُمْ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا أَبَدًا ۖ وَعْدَ اللَّهِ حَقًّا ۚ وَمَنْ أَصْدَقُ مِنَ اللَّهِ قِيلًا ﴿١٢٣﴾

124. එය නුඹලාගේ කැමැත්ත පරිදි හෝ පුස්තකයෙහි ජනතාවගේ කැමැත්ත පරිදි හෝ නොවේ. කවුරුන්හෝ නපුරක් කරන්නේද එයට ප්‍රතිවිපාක දෙනු ලබන්නේය. තවද අල්ලාහ් හැර, තමාට කිසිඳු මිතුරෙකු හෝ උදව්කරුවෙකු ඔහු නොදකින්නේය.

لَّيْسَ بِأَمَانِيِّكُمْ وَلَا أَمَانِيِّ أَهْلِ الْكِتَابِ ۗ مَن يَعْمَلْ سُوءًا يُجْزَ بِهِ وَلَا يَجِدْ لَهُ مِن دُونِ اللَّهِ وَلِيًّا وَلَا نَصِيرًا ﴿١٢٤﴾

125. නමුත් කවුරුන් හෝ, පුරුෂයෙකු හෝ ස්ත්‍රියකු හෝ වේවා, යහපත් ක්‍රියා කරන්නේද, තවද විශ්වාසිතයෙකුද වේ නම්, එවැන්නන් ස්වර්ගයට පිවිසෙන්නෝය, තවද ඉඳි ඇටයක මතුපිටෙහි වූ කුඩා සිදුරක් (තරම් වත්) ඔවුන්ට වරදක් සිදු නොවනු ඇත.

وَمَن يَعْمَلْ مِنَ الصَّالِحَاتِ مِن ذَكَرٍ أَوْ أُنثَىٰ وَهُوَ مُؤْمِنٌ فَأُولَٰئِكَ يَدْخُلُونَ الْجَنَّةَ وَلَا يُظْلَمُونَ نَقِيرًا ﴿١٢٥﴾

126. තවද මුළුමනින්ම අල්ලාහ්ට අවනත වී, යහපත් ක්‍රියා කරන්නෙකුද වී, ඉබ්රාහිම්ගේ ඍජු වූ ධර්මය පිළිපදින්නේද ඔහුට වඩා ධර්මයෙහි යහපත් වන්නේ කවරෙක්ද? තවද අල්ලාහ්, ඉබ්රාහිම්ව විශේෂිත මිතුරෙකු ලෙස ගත්තේය.

وَمَنْ أَحْسَنُ دِينًا مِّمَّنْ أَسْلَمَ وَجْهَهُ لِلَّهِ وَهُوَ مُحْسِنٌ وَاتَّبَعَ مِلَّةَ إِبْرٰهِيمَ حَنِيفًا ۗ وَاتَّخَذَ اللَّهُ إِبْرٰهِيمَ خَلِيلًا ﴿١٢٦﴾

127. තවද අහස්හි ඇති දේද, පොළොවෙහි ඇති දේද අල්ලාහ්ට අයත් වේ. අල්ලාහ් සියළු දේ ග්‍රහණය කරන්නාය.

وَلِلَّهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْأَرْضِ ۗ وَكَانَ اللَّهُ بِكُلِّ شَيْءٍ مُّحِيطًا ﴿١٢٧﴾ ع ١٨ ١١ ١٥

128. තවද ඔවුහු ස්ත්‍රීන් සම්බන්ධයෙන් (නීතිමය) තීන්දුව ඔබගෙන් විමසන්නෝය. පවසන්න, අල්ලාහ් නුඹලාට ඔවුන් සම්බන්ධයෙන් ඔහුගේ තීන්දුව දෙන්නේය. එලෙසම මෙම පුස්තකයෙහි නුඹලාට කියා දෙන ලද අනාථ ගැහැණු ළමයින් සම්බන්ධයෙන්ය, තවද නුඹලා ඔවුන්ට නියම කර ඇති දේ ඔවුන්ට නොදී, ඔවුන්ව විවාහ කරගැනීමට කැමැති වන්නෙහුය. තවද දැරියන් අතරින් දුබලයින් (සම්බන්ධයෙන්ය). තවද නුඹලා අනාථයින් කෙරෙහි සාධාරණය ඉටු කරනු යැයි (ඔහු නුඹලාට අණ කරන්නේය). තවද නුඹලා කුමන යහපත් ක්‍රියාවක් කළද, නියතවශයෙන්ම අල්ලාහ් එය මැනැවින් දන්නේය.

وَيَسْتَفْتُونَكَ فِي النِّسَاءِ ۖ قُلِ اللَّهُ يُفْتِيكُمْ فِيهِنَّ ۙ وَمَا يُتْلٰى عَلَيْكُمْ فِي الْكِتٰبِ فِي يَتٰمَى النِّسَاءِ الّٰتِي لَا تُؤْتُونَهُنَّ مَا كُتِبَ لَهُنَّ وَتَرْغَبُونَ أَن تَنكِحُوهُنَّ وَالْمُسْتَضْعَفِينَ مِنَ الْوِلْدَانِ ۙ وَأَن تَقُومُوا لِلْيَتٰمٰى بِالْقِسْطِ ۗ وَمَا تَفْعَلُوا مِنْ خَيْرٍ فَإِنَّ اللَّهَ كَانَ بِهِ عَلِيمًا ﴿١٢٨﴾

129. තවද කිසියම් ස්ත්‍රියක් ඇයගේ ස්වාමි පුරුෂයා වෙතින් අයුතු සැලකිල්ලක් හෝ අසාධාරණයක් ගැන බිය වන්නේ නම්, ඔවුන් දෙදෙනා අතර සුදුසු පරිදි සමාදානයක් ඇති කර ගැනීම ඔවුන් දෙදෙනා කෙරෙහි කිසිඳු පවක් නොවේ. තවද සමාදානය විශිෂ්ට වේ. තවද මිනිස් සිත් මසුරුකමට නැඹුරු කරවා ඇත. තවද නුඹලා යහපත් ක්‍රියාකරමින්, ධාර්මිෂ්ඨද වන්නේ නම්, නියතවශයෙන්ම නුඹලා කරන දේ ගැන අල්ලාහ් ඉතාමත් සැළකිලිමත්ය.

وَإِنِ امْرَأَةٌ خَافَتْ مِن بَعْلِهَا نُشُوزًا أَوْ إِعْرَاضًا فَلَا جُنَاحَ عَلَيْهِمَا أَن يُصْلِحَا بَيْنَهُمَا صُلْحًا ۗ وَالصُّلْحُ خَيْرٌ ۗ وَأُحْضِرَتِ الْأَنفُسُ الشُّحَّ ۗ وَإِن تُحْسِنُوا وَتَتَّقُوا فَإِنَّ اللَّهَ كَانَ بِمَا تَعْمَلُونَ خَبِيرًا ﴿١٢٩﴾

وَلَنْ تَسْتَطِيعُوٓا أَنْ تَعْدِلُوا بَيْنَ النِّسَآءِ وَلَوْ حَرَصْتُمْ فَلَا تَمِيلُوا كُلَّ الْمَيْلِ فَتَذَرُوهَا كَالْمُعَلَّقَةِ ۚ وَإِنْ تُصْلِحُوا وَتَتَّقُوا فَإِنَّ اللّٰهَ كَانَ غَفُورًا رَّحِيمًا ﴿١٣٠﴾

130. තවද නුඹලාට විශිෂ්ඨ චේතනාවන් තිබුනද, භාර්යයාවන් අතර පරිපූර්ණ සමතුලනයක් නුඹලාට තැබිය නොහැකිය. එබැවින් නුඹලා මුළුමනින්ම (එක් කෙනෙකු) වෙතට පමණක් නැඹුරු වෙමින් අනෙක් තැනැත්තිය නොසළකමින්, රැකබලා නොගනිමින්, අතරමන් කළ අයෙකු ලෙස නොහරිනු. තවද නුඹලා නිවැරදි කරගනිමින්, ධාර්මිෂ්ඨව ක්‍රියාකරන්නේ නම්, නිසැකවම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَإِنْ يَتَفَرَّقَا يُغْنِ اللّٰهُ كُلًّا مِّنْ سَعَتِهِ ۚ وَكَانَ اللّٰهُ وَاسِعًا حَكِيمًا ﴿١٣١﴾

131. තවද ඔවුන් දෙදෙනා වෙන් වුයේ නම් අල්ලාහ්, ඔහුගේ සමෘද්ධිබවින් දෙදෙනාම ස්වාධීනත්වයට පත් කරන්නේය. අල්ලාහ් සර්ව ව්‍යාපකය, ප්‍රඥා සම්පන්නය.

وَلِلّٰهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْأَرْضِ ۗ وَلَقَدْ وَصَّيْنَا الَّذِينَ أُوتُوا الْكِتٰبَ مِنْ قَبْلِكُمْ وَإِيَّاكُمْ أَنِ اتَّقُوا اللّٰهَ ۚ وَإِنْ تَكْفُرُوا فَإِنَّ لِلّٰهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْأَرْضِ ۚ وَكَانَ اللّٰهُ غَنِيًّا حَمِيدًا ﴿١٣٢﴾

132. තවද අහස්හි ඇති දේද, පොළොවෙහි ඇති දේද අල්ලාහ්ට අයත්ය. තවද නිසැකවම අපි නුඹලාට පෙර පුස්තකය දෙන ලද්දන්ටද අල්ලාහ් කෙරෙහි බිය දක්වන්නැයි විධානය කළෙමු, එමෙන්ම නුඹලාටද (විධානය කළෙමු). නමුත් නුඹලා ප්‍රතික්ෂේප කරන්නේ නම්, අහස්හි ඇති දේද, පොළොවෙහි ඇති දේද අල්ලාහ්ට අයත් (බව සිහි තබාගනු), තවද අල්ලාහ් ස්වයංපෝෂිතය, ප්‍රශංසා හිමිය.

وَلِلّٰهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْأَرْضِ ۚ وَكَفٰى بِاللّٰهِ وَكِيلًا ﴿١٣٣﴾

133. තවද අහස්හි ඇති දේද, පොළොවෙහි ඇති දේද අල්ලාහ්ට අයත්ය. තවද ආරක්ෂකයෙකු ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය.

إِنْ يَشَأْ يُذْهِبْكُمْ أَيُّهَا النَّاسُ وَيَأْتِ بِآخَرِينَ ۚ وَكَانَ اللّٰهُ عَلٰى ذٰلِكَ قَدِيرًا ﴿١٣٤﴾

134. ඔහු කැමැති වුයේ නම්, එම්බල ජනතාවෙනි! ඔහු නුඹලාව ඉවත් කොට (නුඹලා වෙනුවට) වෙනත් අයව ගෙන එන්නේය. තවද එසේ කිරීමට මුළු බලය අල්ලාහ් සතුය.

مَنْ كَانَ يُرِيدُ ثَوَابَ الدُّنْيَا فَعِنْدَ اللّٰهِ

135. කවුරුන්හෝ මෙලොවෙහි තිළිණ ප්‍රියකරන්නේද, මෙලොවෙහි සහ

මතුවෙහි තිළිණ අල්ලාහ් සතු (යැයි ඔහු සිහිතබා ගනිත්වා). තවද අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

ثَوَابُ الدُّنْيَا وَالْاٰخِرَةِ ؕ وَكَانَ اللّٰهُ سَمِيْعًاۢ بَصِيْرًا ﴿١٣٥﴾

136. එම්බල විශ්වාසිතයිනි! යුක්තිය ඉටුකිරීමෙහි දැඩිව සිටිනු. (තවද) එය නුඹලාට එරෙහිව හෝ නුඹලාගේ දෙමව්පියන්ට සහ ඥාතීන්ට එරෙහිව වුවද අල්ලාහ් වෙනුවෙන් සාක්ෂිකරුවන් වනු. ඔහු පොහොසත් වුවද, දුප්පත් වුවද අල්ලාහ් ඔවුන් දෙදෙනා පිළිබඳව (නුඹලාට වඩා) සැළකිලිමත් වන්නේය. එබැවින් නුඹලා සාධාරණව කටයුතු කිරීම පිණිස පහත් ආශාවන් අනුගමනය නොකරනු. නුඹලා (සත්‍යය) වසන් කළේ නම් හෝ (එය) මගහැරියේ නම්, නුඹලා කරන දේ ගැන අල්ලාහ් මැනැවින් දන්නේ (යැයි සිහි තබාගනු)

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا كُوْنُوْا قَوّٰمِيْنَ بِالْقِسْطِ شُهَدَآءَ لِلّٰهِ وَلَوْ عَلٰۤى اَنْفُسِكُمْ اَوِ الْوَالِدَيْنِ وَالْاَقْرَبِيْنَ ۚ اِنْ يَّكُنْ غَنِيًّا اَوْ فَقِيْرًا فَاللّٰهُ اَوْلٰى بِهِمَا ۫ فَلَا تَتَّبِعُوا الْهَوٰۤى اَنْ تَعْدِلُوْا ۚ وَاِنْ تَلْوٗۤا اَوْ تُعْرِضُوْا فَاِنَّ اللّٰهَ كَانَ بِمَا تَعْمَلُوْنَ خَبِيْرًا ﴿١٣٦﴾

137. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහිද, ඔහුගේ දූතයාණන් කෙරෙහිද, ඔහුගේ දූතයාණන්ට පහළ කළ පුස්තකය කෙරෙහිද, (එයට) පෙර පහළ කළ පුස්තකය කෙරෙහිද විශ්වාස කරනු. තවද කවුරුන් හෝ අල්ලාහ් කෙරෙහිද, ඔහුගේ සුරදූතයන් කෙරෙහිද, ඔහුගේ පුස්තකයන් කෙරෙහිද, ඔහුගේ දූතයින් කෙරෙහිද, අවසාන දිනය කෙරෙහිද, අවිශ්වාස කරන්නේද, නියතවශයෙන්ම ඔහු දුර්මාර්ගයෙහි බොහෝ දුර ගොස්ය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اٰمِنُوْا بِاللّٰهِ وَرَسُوْلِهٖ وَالْكِتٰبِ الَّذِيْ نَزَّلَ عَلٰى رَسُوْلِهٖ وَالْكِتٰبِ الَّذِيْۤ اَنْزَلَ مِنْ قَبْلُ ؕ وَمَنْ يَّكْفُرْ بِاللّٰهِ وَمَلٰٓئِكَتِهٖ وَكُتُبِهٖ وَرُسُلِهٖ وَالْيَوْمِ الْاٰخِرِ فَقَدْ ضَلَّ ضَلٰلًاۢ بَعِيْدًا ﴿١٣٧﴾

138. කවුරුන් හෝ විශ්වාස කර, පසුව අවිශ්වාස කර නැවත විශ්වාස කර, පසුවද අවිශ්වාස කර, (අනතුරුව) අවිශ්වාසයෙහිම වැඩි වන ඔවුනට අල්ලාහ් කිසිසේත්ම ක්ෂමාව නොදෙන්නේය. ඔහු ඔවුන්ව යහමගට යොමුකරන්නේ ද නොමැත.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا ثُمَّ كَفَرُوْا ثُمَّ اٰمَنُوْا ثُمَّ كَفَرُوْا ثُمَّ ازْدَادُوْا كُفْرًا لَّمْ يَكُنِ اللّٰهُ لِيَغْفِرَ لَهُمْ وَلَا لِيَهْدِيَهُمْ سَبِيْلًا ؕ ﴿١٣٨﴾

139. කුහකයින්ට, ඔවුන් සඳහා බරපතල දඬුවමක් ඇති බවට ආරංචිය දෙනු.

بَشِّرِ الْمُنٰفِقِيْنَ بِاَنَّ لَهُمْ عَذَابًا اَلِيْمَا ۙ ﴿١٣٩﴾

140. ඔවුහු මිත්‍රයින් ලෙස විශ්වාසිතයින් වෙනුවට අවිශ්වාසිතයින්ව ගනිති. ඔවුහු මොවුන් වෙතින් ගෞරවය අපේක්ෂා කරන්නෝද? එසේනම් සියළු ගෞරව අල්ලාහ්ට හිමි (යැයි ඔවුන් සිහිතබා ගනිත්වා)

الَّذِيْنَ يَتَّخِذُوْنَ الْكٰفِرِيْنَ اَوْلِيَآءَ مِنْ دُوْنِ الْمُؤْمِنِيْنَ ؕ اَيَبْتَغُوْنَ عِنْدَهُمُ الْعِزَّةَ فَاِنَّ الْعِزَّةَ لِلّٰهِ جَمِيْعًا ؕ ﴿١٤٠﴾

141. තවද අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරනු ලැබීමද, සරදම් කරනු ලැබීමද නුඹලා ඇසුවහොත් ඔවුන් එය හැර වෙනත් කථාවක යෙදෙන තුරු නුඹලා ඔවුන් සමඟ අසුන් නොගනුයි ඔහු පුස්තකයේ නුඹලාට දැනටමත් අනාවරණය කර ඇත. එසේ වුවහොත් නුඹලාද ඔවුන් මෙන් වන්නෝය. නියතවශයෙන්ම අල්ලාහ් කුහකයින් සහ අවිශ්වාසිතයින් යන සියල්ලන්වම නිරයෙහි එක්රැස් කරවයි.

وَقَدْ نَزَّلَ عَلَيْكُمْ فِى الْكِتٰبِ اَنْ اِذَا سَمِعْتُمْ اٰيٰتِ اللّٰهِ يُكْفَرُ بِهَا وَيُسْتَهْزَاُ بِهَا فَلَا تَقْعُدُوْا مَعَهُمْ حَتّٰى يَخُوْضُوْا فِىْ حَدِيْثٍ غَيْرِهٖٓ ۖ اِنَّكُمْ اِذًا مِّثْلُهُمْ ؕ اِنَّ اللّٰهَ جَامِعُ الْمُنٰفِقِيْنَ وَالْكٰفِرِيْنَ فِىْ جَهَنَّمَ جَمِيْعًا ۙ ﴿١٤١﴾

142. මොවුන් නුඹලා පිළිබඳව (ආරංචියක්) බලාපොරොත්තුවෙන් සිටිති. නුඹලාට අල්ලාහ්ගෙන් ජයක් ලැබුනේ නම්, මොවුන් 'අපි නුඹලා සමඟ නොසිටියෙමුදැ?'යි පවසති. තවද අවිශ්වාසිතයින්ට (එයින්) කොටසක් ලැබුනේ නම්, මොවුන් 'අපි නුඹලාට වඩා ශක්තිමත් වෙමින් විශ්වාසිතයින්ගෙන් නුඹලාව ආරක්ෂා නොකළෙමුදැ?'යි (ඔවුන් වෙත) පවසති. පුනරුත්ථාන දිනයේදී අල්ලාහ් නුඹලා අතර විනිශ්චය කරන්නේය. තවද විශ්වාසිතයින්ව (අභිබවා යෑමට) අල්ලාහ් අවිශ්වාසිතයින්ට කිසිඳු මගක් නොදෙන්නේය.

الَّذِيْنَ يَتَرَبَّصُوْنَ بِكُمْ ۚ فَاِنْ كَانَ لَكُمْ فَتْحٌ مِّنَ اللّٰهِ قَالُوْۤا اَلَمْ نَكُنْ مَّعَكُمْ ۖ وَاِنْ كَانَ لِلْكٰفِرِيْنَ نَصِيْبٌ ۙ قَالُوْۤا اَلَمْ نَسْتَحْوِذْ عَلَيْكُمْ وَنَمْنَعْكُمْ مِّنَ الْمُؤْمِنِيْنَ ؕ فَاللّٰهُ يَحْكُمُ بَيْنَكُمْ يَوْمَ الْقِيٰمَةِ ؕ وَلَنْ يَّجْعَلَ اللّٰهُ لِلْكٰفِرِيْنَ عَلَى الْمُؤْمِنِيْنَ سَبِيْلًا ﴿١٤٢﴾ ع

143. කුහකයින් අල්ලාහ්ව මුළා කිරීමට තැත් කරති. එහෙත් ඔහු ඔවුන්වම මුළාවීමට සළස්වන්නේය. තවද ඔවුහු නමස්කාරය සඳහා

اِنَّ الْمُنٰفِقِيْنَ يُخٰدِعُوْنَ اللّٰهَ وَهُوَ خَادِعُهُمْ ۚ وَاِذَا قَامُوْۤا اِلَى الصَّلٰوةِ

قَامُوْا كُسَالٰى ۙ يُرَآءُوْنَ النَّاسَ وَلَا يَذْكُرُوْنَ اللّٰهَ اِلَّا قَلِيْلًا ۙ﴿١٤٣﴾

සිටගන්නා විට අලසභාවයෙන් සිටගනිති. (තවද) ඔවුහු (නමස්කාරය) මිනිසුන්ට පෙන්වීම පිණිසය. තවද ඔවුහු අල්ලාහ්ව ස්වල්ප වශයෙන් පමණක් සිහි කරති.

مُّذَبْذَبِيْنَ بَيْنَ ذٰلِكَ ۖ لَآ اِلٰى هٰٓؤُلَآءِ وَلَآ اِلٰى هٰٓؤُلَآءِ ؕ وَمَنْ يُّضْلِلِ اللّٰهُ فَلَنْ تَجِدَ لَهٗ سَبِيْلًا ﴿١٤٤﴾

144. ඔවුන් එහි අතරමැද දෙගිඩියාවෙන් පසුවෙති. මේ අයටත් ඒ අයටත් (අයත්) නොවන්නෝය. තවද අල්ලාහ් කවරෙකු හෝ විනාශයට පත් කරන්නේද, ඔහුට කිසිඳු මගක් ඔබ නොදකිනු ඇත.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَتَّخِذُوا الْكٰفِرِيْنَ اَوْلِيَآءَ مِنْ دُوْنِ الْمُؤْمِنِيْنَ ؕ اَتُرِيْدُوْنَ اَنْ تَجْعَلُوْا لِلّٰهِ عَلَيْكُمْ سُلْطٰنًا مُّبِيْنًا ﴿١٤٥﴾

145. එම්බල විශ්වාසිතයිනි! විශ්වාසිතයින්ට වඩා ප්‍රමුඛව, අවිශ්වාසිතයින්ව මිත්‍රයින් ලෙස නොගනු. නුඹලා තමන්ටම එරෙහිව අල්ලාහ්ට පැහැදිලි සාධක ගෙනහැර පෑමට අදහස් කරන්නෙහුද?

اِنَّ الْمُنٰفِقِيْنَ فِى الدَّرْكِ الْاَسْفَلِ مِنَ النَّارِ ۚ وَلَنْ تَجِدَ لَهُمْ نَصِيْرًا ۙ﴿١٤٦﴾

146. නියතවශයෙන්ම කුහකයින් ගින්නෙහි ගැඹුරුම පතුලෙහි සිටින්නෝය. තවද ඔවුනට කිසිදු උදව්කරුවෙකු ඔබ නොදකින්නෙහිය.

اِلَّا الَّذِيْنَ تَابُوْا وَاَصْلَحُوْا وَاعْتَصَمُوْا بِاللّٰهِ وَاَخْلَصُوْا دِيْنَهُمْ لِلّٰهِ فَاُولٰٓئِكَ مَعَ الْمُؤْمِنِيْنَ ؕ وَسَوْفَ يُؤْتِ اللّٰهُ الْمُؤْمِنِيْنَ اَجْرًا عَظِيْمًا ﴿١٤٧﴾

147. පශ්චාත්තාප වෙමින්, නිවැරදි කර ගනිමින්, අල්ලාහ්ව දැඩිව ග්‍රහණය කරගනිමින්, අල්ලාහ්ට ඔවුන්ගේ අවනතභාවයෙහි අවංක වන්නාවූ අය හැරෙන්නටය. මොවුහු විශ්වාසිතයින් අතර වෙති. තවද අල්ලාහ් විශ්වාසිතයින්හට විශිෂ්ටවූ තිළිණයක් ඉක්මනින් පිරිනමන්නේය.

مَا يَفْعَلُ اللّٰهُ بِعَذَابِكُمْ اِنْ شَكَرْتُمْ وَاٰمَنْتُمْ ؕ وَكَانَ اللّٰهُ شَاكِرًا عَلِيْمًا ﴿١٤٨﴾

148. නුඹලා කෘතඥ වෙමින්, විශ්වාස කරන්නේ නම්, අල්ලාහ් නුඹලාට දඬුවම් දෙන්නේ කුමකටද? තවද අල්ලාහ් අගය කරන්නාය, සියල්ල දත්තාය.

6 කොටස

لَا يُحِبُّ اللّٰهُ الْجَهْرَ بِالسُّوْٓءِ مِنَ الْقَوْلِ اِلَّا مَنْ ظُلِمَ ۭ وَكَانَ اللّٰهُ سَمِيْعًا عَلِيْمًا ﴿١٤٩﴾

149. අශෝභන වදන් ප්‍රසිද්ධියේ ප්‍රකාශ කිරීම අල්ලාහ් ප්‍රිය නොකරන්නේය. අසාධාරණයට ලක්කරනු ලැබුවෙකු හැරය. නිශ්චිතවම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

اِنْ تُبْدُوْا خَيْرًا اَوْ تُخْفُوْهُ اَوْ تَعْفُوْا عَنْ سُوْۗءٍ فَاِنَّ اللّٰهَ كَانَ عَفُوًّا قَدِيْرًا ﴿١٥٠﴾

150. නුඹලා කිසියම් යහපත් ක්‍රියාවක් ප්‍රසිද්ධියේ කරන්නේ නම් හෝ එය සඟවා තබන්නේ නම් හෝ නපුරකට සමාව දෙන්නේ නම් හෝ නිසැකවම අල්ලාහ් පව් මකා දමන්නාය, (තවද) බලසම්පන්නය.

اِنَّ الَّذِيْنَ يَكْفُرُوْنَ بِاللّٰهِ وَرُسُلِهٖ وَيُرِيْدُوْنَ اَنْ يُّفَرِّقُوْا بَيْنَ اللّٰهِ وَرُسُلِهٖ وَيَقُوْلُوْنَ نُؤْمِنُ بِبَعْضٍ وَّنَكْفُرُ بِبَعْضٍ ۙ وَّيُرِيْدُوْنَ اَنْ يَّتَّخِذُوْا بَيْنَ ذٰلِكَ سَبِيْلًا ﴿١٥١﴾

151. නියතවශයෙන්ම අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයින් කෙරෙහිද අවිශ්වාස කරන අය ගත්කල ඔවුන් අල්ලාහ් සහ ඔහුගේ දූතයින් අතර වෙනස්කමක් ඇති කිරීමට කැමැති වන්නෝය. තවද 'අපි සමහරෙකු කෙරෙහි විශ්වාස කරන අතර තවත් සමහරෙකු කෙරෙහි අවිශ්වාස කරමු'යි ඔවුන් පවසති. තවද මගක් ගන්නටද ඔවුන් කැමැති වන්නෝය.

اُولٰۗىِٕكَ هُمُ الْكٰفِرُوْنَ حَقًّا ۚ وَاَعْتَدْنَا لِلْكٰفِرِيْنَ عَذَابًا مُّهِيْنًا ﴿١٥٢﴾

152. නියතවශයෙන්ම ස්ථිර අවිශ්වාසිතයින් මොවුහුමය. තවද අවිශ්වාසිතයින් සඳහා නින්දිතවූ දඬුවමක් අපි පිළියෙල කර ඇත්තෙමු.

وَالَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ وَرُسُلِهٖ وَلَمْ يُفَرِّقُوْا بَيْنَ اَحَدٍ مِّنْهُمْ اُولٰۗىِٕكَ سَوْفَ يُؤْتِيْهِمْ اُجُوْرَهُمْ ۭ وَكَانَ اللّٰهُ غَفُوْرًا رَّحِيْمًا ﴿١٥٣﴾ ع

153. තවද අල්ලාහ් කෙරෙහිද, ඔහුගේ (සියලු) දූතයින් කෙරෙහිද විශ්වාස කරමින්, ඔවුන් කිසිවෙකු අතර වෙනස්කමක් ඇති නොකරන්නන් හට, ඔවුන්ගේ තිළිණයන් ඔහු ඉක්මනින් ලබා දෙන්නේය. අල්ලාහ් අතිශයින්ම සමාමාන්විතය, දයාබරය.

يَسْــَٔــلُكَ اَهْلُ الْكِتٰبِ اَنْ تُنَزِّلَ عَلَيْهِمْ كِتٰبًا مِّنَ السَّمَاۗءِ فَقَدْ سَاَلُوْا مُوْسٰٓى اَكْبَرَ مِنْ ذٰلِكَ فَقَالُوْٓا اَرِنَا اللّٰهَ جَهْرَةً فَاَخَذَتْهُمُ

154. පුස්තකයෙහි ජනතාව ඔබගෙන් අහසින් පුස්තකයක් ඔවුන් වෙත පහළ කරන්නැයි ඉල්ලති. ඔවුහු මූසාගෙන් මෙයටත් වඩා මහත්වූ දෙයක් ඉල්ලූහ. 'අපට අල්ලාහ්ව එළිපිටම පෙන්වනු'යි ඔවුහු කීහ. එවිට ඔවුන්ගේ සීමාව ඉක්මවීම

الصّٰعِقَةُ بِظُلْمِهِمْ ۚ ثُمَّ اتَّخَذُوا الْعِجْلَ مِنْۢ بَعْدِ مَا جَآءَتْهُمُ الْبَيِّنٰتُ فَعَفَوْنَا عَنْ ذٰلِكَ ۚ وَاٰتَيْنَا مُوْسٰى سُلْطٰنًا مُّبِيْنًا ﴿١٥٤﴾

හේතුවෙන් විනාශකාරී දඬුවමක් ඔවුන්ව හසුකර ගත්තේය. අනතුරුව ඔවුනට පැහැදිලි සළකුණු පැමිණි පසුවද ඔවුහු (නැමදුම සඳහා) වසු පැටවෙකු ගත්හ. එහෙත් අපි එයට(ද) සමාව දුන්නෙමු. තවද අපි මූසාට පැහැදිලි ප්‍රබල තර්කයක් දුනිමු.

وَرَفَعْنَا فَوْقَهُمُ الطُّوْرَ بِمِيْثَاقِهِمْ وَقُلْنَا لَهُمُ ادْخُلُوا الْبَابَ سُجَّدًا وَّقُلْنَا لَهُمْ لَا تَعْدُوْا فِى السَّبْتِ وَاَخَذْنَا مِنْهُمْ مِّيْثَاقًا غَلِيْظًا ﴿١٥٥﴾

155. අපි ඔවුන්ගෙන් ප්‍රතිඥාවක් ලබාගනිමින් ඔවුනට ඉහලින් කන්ද එසෙව්වෙමු. එමෙන්ම අපි ඔවුනට, 'නුඹලා යටහත් පහත්ව දොරටුවෙන් ඇතුළුවනු'යි කීවෙමු. තවද අපි ඔවුනට, 'සබත් (විෂයයෙහි) සීමාව නොඉක්මවනු'යි කීවෙමු. තවද අපි ඔවුන්ගෙන් ස්ථිරවූ ප්‍රතිඥාවක් ගත්තෙමු.

فَبِمَا نَقْضِهِمْ مِّيْثَاقَهُمْ وَكُفْرِهِمْ بِاٰيٰتِ اللّٰهِ وَقَتْلِهِمُ الْاَنْۢبِيَآءَ بِغَيْرِ حَقٍّ وَّقَوْلِهِمْ قُلُوْبُنَا غُلْفٌ ۗ بَلْ طَبَعَ اللّٰهُ عَلَيْهَا بِكُفْرِهِمْ فَلَا يُؤْمِنُوْنَ اِلَّا قَلِيْلًا ۖ ﴿١٥٦﴾

156. පසුව, ඔවුන්ගේ තම ප්‍රතිඥාව කඩ කිරීමද අල්ලාහ්ගේ සළකුණු ඔවුන්ගේ ප්‍රතික්ෂේප කිරීමද අසාධාරණ ලෙස වක්තෘවරුන්ව ඝාතනය කිරීමට ඔවුන්ගේ තැත් කිරීමද 'අපගේ හදවත් ආවරණයන්ගෙන් වැසී ඇත'යි ඔවුන්ගේ පැවසීම හේතුවෙන්ද එපමණක් නොව, ඔවුන්ගේ අවිශ්වාසිතභාවය හේතුවෙන් අල්ලාහ් ඒවාට මුද්‍රා තැබුවේය. එබැවින් ඔවුහු ස්වල්පයක් මිස විශ්වාස නොකරති.

وَّبِكُفْرِهِمْ وَقَوْلِهِمْ عَلٰى مَرْيَمَ بُهْتَانًا عَظِيْمًا ۙ ﴿١٥٧﴾

157. තවද ඔවුන්ගේ ප්‍රතික්ෂේප කිරීමද මර්යම්ට එරෙහිව ඔවුන්ගේ බරපතල අයුතු චෝදනා කිරීම හේතුවෙනි.

وَّقَوْلِهِمْ اِنَّا قَتَلْنَا الْمَسِيْحَ عِيْسَى ابْنَ مَرْيَمَ رَسُوْلَ اللّٰهِ ۚ وَمَا قَتَلُوْهُ وَمَا صَلَبُوْهُ وَلٰكِنْ شُبِّهَ لَهُمْ ۗ وَاِنَّ الَّذِيْنَ

158. තවද 'අල්ලාහ්ගේ දූතයෙකු වන මර්යම්ගේ පුත් ඊසා මෙසායාව නිසැකවම අපි ඝාතනය කළෙමු'යි ඔවුන්ගේ පැවසීම හේතුවෙනි. එහෙත් ඔවුන් ඔහුව ඝාතනය කළේද නොමැත. කුරුසයෙහි තබා මැරුවේද◆ නොමැත. නමුත් ඔවුනට

◆ එනම්: ඔහුව කුරුසයේ පිට ඇණ ගසා මරා දැමීම.

اخْتَلَفُوا فِيهِ لَفِي شَكٍّ مِّنْهُ ۚ مَا لَهُم بِهِ مِنْ عِلْمٍ إِلَّا اتِّبَاعَ الظَّنِّ ۚ وَمَا قَتَلُوهُ يَقِينًا ﴿١٥٨﴾

* ඔහුව (කුරුසයේ පිට ඇණ ගසා මරා දැමුවෙකු මෙන්) පෙනෙන්නට සලස්වන ලදී. තවද මෙහි වෙනස් මතභේද දරණ අය, ඇත්තෙන්ම මේ පිළිබඳව සැකයෙහි (තත්ත්වයක) සිටිති. ඔවුන්ට එය පිළිබඳව (නියත) දැනුමක් නොමැති නමුත් අනුමානයක් අනුගමනය කරති. තවද ඔවුහු ඔහුව නිසැකවම ඝාතනය නොකළහ.

بَل رَّفَعَهُ اللَّهُ إِلَيْهِ ۚ وَكَانَ اللَّهُ عَزِيزًا حَكِيمًا ﴿١٥٩﴾

* 159. එයට පටහැනිව, අල්ලාහ් තමා වෙතට ඔහුව උසස් කළේය. අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය.

---

* සටහන. 158: ඊසාව කුමන හෝ ආකාරයෙන් ඝාතනය කිරීමට ගත් ඔවුන්ගේ ප්‍රයත්නය අසාර්ථක වීම පිළිබඳ අවධාරනයෙන් පෙන්නුම් කරයි. ඊසාව ඝාතනය කිරීම පිළිබඳව යුදෙව්වන් දොඩන පුරසාරම් වාක්‍යයේ මුල් කොටසෙන් කියවන්නා හට මතක් කරදීමක් කරදෙනු ලැබේ.

යුදෙව්වන්ගේ මෙම අයිතිවාසිකම් කියාපෑම ශුද්ධ වූ කුර්ආනය මගින් තරයේ ප්‍රතික්ෂේප කරනලදී. එබැවින් වාක්‍යයේ අවසන් කොටසෙහි තිරණාත්මක ප්‍රකාශය වන්නේ කුමන දෙයක් හෝ සිදුවුවත් නිශ්චිතවම ඔහුව ඝාතනය කිරීමට ඔවුන් අසාර්ථක වූ බවය.

මෙයින් අදහස් වන්නේ කුරුසය මත ඇණ ගැසීමේ ක්‍රියාවලිය ප්‍රතික්ෂේප කිරීම නොව කුරුසය මත මරණය නොවූ බව ප්‍රතික්ෂේප කරනු ලැබීමයි.

'වලාකින් ශුබ්බිහ ලහුම්' ( وَلَٰكِن شُبِّهَ لَهُمْ ) මෙයින් සඳහන් වන 'ශුබ්බිහ' ( شُبِّهَ ) යන වචනය මනාව අධ්‍යනය කළ යුතුය. මුලින් සඳහන් කළාවූ වාක්‍යයේ කරුණ ඊසා හැර අන් අයෙකු හෝ එසේ නැතහොත් පොදුවූ සිද්ධියක් සම්බන්ධයෙන් හෝ සඳහන් කළහැකි බවට අවසර දෙනු නොලැබේ. මෙහි 'ශුබ්බිහ' ( شُبِّهَ ) යන වචනයේ ව්‍යාකාරානුකූලව යොදා ඇති සර්වනාමය ඊසා හැර වෙන කිසිවෙකුවත් සඳහන් කළ නොහැක. මෙයින් ඔහුව හඳුනා ගැනීමට අපහසු වූ බවත් ඔහු හා සමාන කෙනෙකුව ඔවුනට පෙනෙන්නට සැලසුබවත් අදහස් කරයි. මේ අනුව ඊසාව කුරුසයේ එල්ලා තැබීම වෙන කෙනෙකුව එල්ලා තැබීමක් ලෙස පෙනුණි. මෙයින් පෙන්වන්නේ කුරුසය මත ඇණගැසීම හෝ එයින් මරණයක් සිදුවූ ලෙස පෙන්වන්නට සැලැස්වීම ප්‍රතික්ෂේප කිරීමක් නොව කුරුසය මත ඇණ ගැසීමෙන් එම මරණය සිදු වූ බව ප්‍රතික්ෂේප කිරීමයි. ඇත්තෙන්ම සිදුවූයේ කුමක්ද යන්න පිළිබඳව මහත් ව්‍යාකූලභාවයක් ඇතිවිය. එබැවින් මෙම වාක්‍ය ව්‍යාකුල භාවය හා සැකය යනාදියෙන් වූ සම්භවය නොනවත්වා වර්ධනය කරයි. මෙය හැර අන් සියල්ල අනුමානයකි, අවසන් නිගමනයද මෙයයි.

'ශුබ්බිහ' ( شُبِّهَ ) යන වචනය මේ සිද්ධියට අදාලවේ නම් මෙය ප්‍රතිවිරුද්ධ අයිතිවාසිකම් කියාපාන තර්ක කරන දෙපාර්ශවයක් අතර කුමක් සිදුවූයේද යන්න පෙන්නුම් කරනු ඇත. ඔවුන්ගේ අයිතිවාසිකම් කියාපෑමේ වලංගුභාවය මෙම දෙපාර්ශවය අතරද ස්ථිර නැත. උදාහරණයක් වශයෙන් කුරුසය මත ඇණ ගසා ඊසාගේ මරණය සහ පසුව මළවුන්ගෙන් නැගිටුවීම පිළිබඳව කිතුනුවන්ගේ විශ්වාසය කිසිම පදනමක් නොවන හුදෙක් අනුමානයකි. එමෙන්ම කුරුසය මත ඊසාගේ මරණය සම්බන්ධයෙන් යුදෙව්වන්ගේ අයිතිවාසිකම් කියාපෑම අනුමාන සහගතය. මේ හෙයින් ඔවුන්ගේ ඉල්ලීම වනුයේ පිලාතුස්ගෙන් ඊසාගේ දේහය ලබා ගැනීම සඳහාය.

ඇත්තෙන්ම ඔහුගේ මරණය යැයි කියන ලද සම්පූර්ණ කථාංගය සම්බන්ධයෙන් ඔවුන්ගේ සැකයන් පැහැදිලිව ප්‍රකාශ කළහ. තවද ඔහුගේ මරණයෙන් ගැලවීමේ සම්භාවිතාවයෙහි ඔහු මළවුන්ගෙන් නැගිටුවන ලද්දා යැයි පවසමින් මහජනයා ඉදිරියේ නැවත පෙනී සිටීමට හැකිවේ යැයි පිලාතුස්ට අවවාද කළහ. (මතේව් 27:63-64-)

මෙම වාක්‍යයේ 'වඉන්නල්ලzසින' ( وَإِنَّ الَّذِينَ ) යන අවසන් කොටස අධ්‍යනය යටතේ පවසන විට ඇත්තෙන්ම කවුරුන්හෝ මේ පිළිබඳව (නැත්නම් ඔහු පිළිබඳව එසේම ඇත්තෙන්ම ඔහුට සිදුවූ විපත ගැන) වෙනස් මතභේද දරන්නේද ඔවුන්ම සැකයේ පසුවෙති.

* සටහන. 159: 'බල් රෆඅහුල්ලාහු ඉලයිහි'( بَل رَّفَعَهُ اللَّهُ إِلَيْهِ ) බහුතර ලෞකික මත දරන මුස්ලිම්වරුන්ගේ අනුමානය මෙම වාක්‍යයේ කොටසේ 'බල්' ( بَل ) යන්න කුරුසය මත ඇණ ගැසීමේ ක්‍රියාවලිය වෙතට අරුත් ගන්වයි. එනම් ඔහු කුරුසය මත මිය යෑම වෙනුවට දෙවියන් ස්වර්ගයේ යම් තැනකට ඔහුව ශාරීරිකව එසවීම මගින් ඔහුව මුදවාගත් බවයි. එසේ හෙයින් ඔහුව කුරුසය මත ඇණගැසීමට පෙර සිටි ආකාරයෙන්ම අහසේ කොතැනක හෝ ඔහුට හිමිව තිබූ ශරීරයෙන් ඔහු ජීවත්ව සිටිය යුතුයි. මෙම අර්ථවිවරණය බොහෝ ගැටළු සහගත ප්‍රශ්ණ මතු කරයි. ප්‍රධානවශයෙන්,

وَإِن مِّنْ أَهْلِ الْكِتَابِ إِلَّا لَيُؤْمِنَنَّ بِهِ قَبْلَ مَوْتِهِ ۖ وَيَوْمَ الْقِيَامَةِ يَكُونُ عَلَيْهِمْ شَهِيدًا ﴿١٦٠﴾

*160. තවද තම මරණයට පෙර ඔහු කෙරෙහි විශ්වාස නොකරන්නාවූ කවර(ගෝත්‍රිකයෙ)කුත් පුස්තකයෙහි ජනතාව අතර නොවනු ඇත. තවද පුනරුත්ථාන දිනයේදී ඔහු (ඊසා) ඔවුනට එරෙහිව සාක්ෂිකරුවෙකු වනු ඇත.

فَبِظُلْمٍ مِّنَ الَّذِينَ هَادُوا حَرَّمْنَا عَلَيْهِمْ طَيِّبَاتٍ أُحِلَّتْ لَهُمْ وَبِصَدِّهِمْ عَن سَبِيلِ اللَّهِ كَثِيرًا ﴿١٦١﴾

161. එබැවින්, යුදෙව්වන්ගේ සීමාව ඉක්මවීම හේතුවෙන් ඔවුනට අනුමත කර තිබූ පවිත්‍ර දේ අපි ඔවුනට තහනම් කළෙමු. එලෙසම අල්ලාහ්ගේ මාර්ගයෙන් බොහෝ (අයවලුන්ව) ඔවුන්ගේ වැළැක්වීමේ හේතුවෙන්ද,

(අ) ඊසා කිසිවිටෙකත් ඇණ ගැසීමට ලක් නොවූයේ නම් කුරුසයේ ඇණ ගැසීමේ සම්පූර්ණ ඉතිහාසය ප්‍රබල ලෙස ප්‍රතික්ෂේප කරනු ලබන්නේද? එමෙන්ම යුදෙව්වන්, කිතුනුවන්, හා රෝමානුවන් ප්‍රබන්ධයක් හෝ මායාවක් වූ කථාංගයක් ලෙස අත් විඳිනු ලැබුවේද?
(ආ) මෙම වාක්‍යයෙහි ඊසා ශාරීරිකව අහස් වෙතට ඔසවන ලද බවට ඇත්තේ කොතැනකද?

මේ සියල්ල සරලව සඳහන් කර ඇත්තේ අල්ලාහ් ඔහුව තමා වෙතට උසස් කළ බවයි.

පළමු ප්‍රශ්නය ගත් කළ ලෞකික මතයන් දරන්නන් කුරුසය මත ඇණගැසීමේ සත්‍යය සම්බන්ධයෙන් ප්‍රතික්ෂේප නොකරන අතර ඒ අයුරින් අරුම පුදුම සම්භවයන් එයින්ම ගොඩ නගති. නමුත් එහි වාදය වන්නේ කුරුසය මත ඇණ ගසනු ලැබුවේ ඊසාව නොව දෙවියන්ගේ අණ පරිදි සමහර සුරදූතයින් මගින් ඊසාගේ රූපය මෙන් දෙනු ලැබූ වෙන කෙනෙකු බවය. මේ අනුව කුරුසය මත ඇණගැසූ තැනැත්තාගේ අනන්‍යතාවය පිළිබඳ සැකයක් සහ අනුමානයක් ඇතිවිය. ප්‍රත්‍යක්ෂ ලෙස මෙම පැහැදිලි කිරීම් ඒවායේ විසඳුම් වලට වඩා ප්‍රශ්න රාශියක් පමණක් මතු කරයි. තවදුරටත් මේ සියළු කතාන්තර මුළුමනින්ම පදනම් විරහිතය. බොහෝ අනුමාන වශයෙන් කරනු ලැබූ ව්‍යාකූලතාවයන් පහසුවෙන් එකතු කරන මෙම විස්මාකාර වාදයට ආධාරකව කිසිවක් ලිඛිත සාක්ෂිවල හෝ ශුද්ධ වක්තෘවරයාණන්ගේ සම්ප්‍රදායන් වල ඉදිරිපත් කර නැත. මෙම වාක්‍යයේ පැහැදිලි කිරීම කෙසේදයත් දෙවියන්ගේ ශුද්ධ වූ වක්තෘවරයා (ශාන්තිය හා සමාදානය අත්වේවා) මුළුමනින්ම මෙය සම්බන්ධයෙන් කිසිම දැනුමක් නොදැන සිටියදීත් මධ්‍යකාලීන උගතුන්ට මෙය පහළවූවාක් මෙන්ය.

දෙවන ප්‍රශ්නය ගත් කල ශුද්ධ කුර්ආනයේ වචන යෙදීම අනුව පැහැදිලිවම පෙනෙන්නේ එම වාදයන්ගේ දුර්වලතාවයයි. 'රෆඅ' ( رَفَعَ )යන වචනයේ තේරුම උසස් බවට පත්කිරීමයි. සෑමවිටම අල්ලාහ් යම් තැනැත්තෙකුව උසස් කරන්නේද එම උසස් කිරීම නිරතුරුවම සඳහන් වන්නේ එම තැනැත්තාගේ තරාතිරම මිස කිසිසේත්ම ඔහුගේ ශරීරය නොවේ. ඇත්තවශයෙන්ම මෙම වාක්‍ය ඉහත සඳහන් අරුතය හැරෙන්නට අන් කිසිදු අයුරකින් පරිවර්තනය කිරීමට නොහැක. එනම් එය අධ්‍යාත්මික තත්ත්වයේ උසස් කිරීමකි. මෙම වාක්‍යයෙන් ප්‍රකාශ කරන්නේ අල්ලාහ් ඊසාව තමා වෙතට උසස් කළ බවයි. ප්‍රත්‍යක්ෂව අහස් ගැබෙහි කිසිම ලකුණක් අල්ලාහ් ඔහුව උසස් කළ බවට සඳහන් කර නොමැත. ඔහු තමා වෙතට ඔහුව උසස් කල අතර තුර ඊසා කොතැන සිටියද ඔහු එතැන සිටියේය. අහස්හිද පොළොවෙහිද අල්ලාහ් නොමැති ස්ථානයක් නොමැත. එබැවින් ඔහු වෙතට එසවූ ලෙස කවුරුන්හෝ පැවසූ කල්හි ශාරීරිකව සෙලවීමක් කිසිසේත් සිදුවිය නොහැකි අතර එය සිතාගැනීමට පවා නොහැක. මෙම වාක්‍යය අන්මදී මුස්ලිම්වරුන්ගේ වටහා ගැනීම අනුව, 'පටහැනිව' යන වදන යුදෙව්වන්ගේ වාදය වන ඊසාගේ ශාපලත් මරණය සඳහන් කරයි. නිසැකවම ශාපයේ විරුද්ධ පදය දෙවියන්ගේ සම්පතාවයයි.

*සටහන. 160: මෙම වාක්‍ය එහි ඇති නියම වැදගත්කම තර්කානුකූල විෂයකට තුඩුදේ. ඇතැම් උගතුන්ගේ විශ්වාසය පරිදි මෙහි සඳහන මතු අනාගතයේදී සෑම යුදෙව්වෙක්ම එකෙකුදු නොහැර යම් දිනෙක කුරුසය මත ඇණ ගැසීම මොහොත සම්බන්ධව ඊසා කෙරෙහි විශ්වාසයක් තබමින් ඔහුව දෙවියන්ගේ වක්තෘවරයෙක් ලෙස පිළිගනු ඇත. ඔවුන්ගේ වාදය පරිදි ඊසාගේ ජීවිත කාලයේදීම මෙම ආශ්චර්යය සිදුවන බව මෙම වාක්‍යයේද සඳහන් කර ඇත. 'කබ්ල මව්තිහි' ( قَبْلَ مَوْتِهِ ) එනම් 'ඔහුගේ මරණයට පෙර' යන වචනයෙන් ඔවුන් තේරුම් ගෙන ඇත.

යුදෙව්වන් තවමත් ඔහුව පිළිනොගෙන සිටීම නිසා මෙවන් උගතුන්ට අනුව ඊසා තවමත් ජීවත්ව සිටිය යුතුමය. අනෙක් පොදුවූ අදහස වනුයේ 'ඔහුගේ මරණයට පෙර' යන කියමන ඊසාගේ කාලයේ සිටි සෑම යුදෙව් සාමාජිකයන්ගේ විශ්වාසය වෙතට යොමු කරයි. මේ සම්බන්ධව මෙයින්

وَّاَخۡذِهِمُ الرِّبٰوا وَقَدۡ نُهُوۡا عَنۡهُ وَاَكۡلِهِمۡ اَمۡوَالَ النَّاسِ بِالۡبَاطِلِ‌ؕ وَاَعۡتَدۡنَا لِلۡكٰفِرِيۡنَ مِنۡهُمۡ عَذَابًا اَلِيۡمًا ﴿١٦٢﴾

162. තවද ඔවුනට එය (පොලිය) තහනම් කරනු ලැබ තිබියදීත් ඔවුන්ගේ පොලී ගැනීම (හේතුවෙන්ද), ජනතාවගේ වස්තුව අයුතු ලෙස ඔවුන්ගේ ගිල දැමීම (හේතුවෙන්ද). තවද ඔවුන්ගෙන් අවිශ්වාස කරන්නන් හට වේදනාකාරී දඬුවමක් අපි පිළියෙළ කර ඇත්තෙමු.

لٰـكِنِ الرّٰسِخُوۡنَ فِى الۡعِلۡمِ مِنۡهُمۡ وَالۡمُؤۡمِنُوۡنَ يُؤۡمِنُوۡنَ بِمَاۤ اُنۡزِلَ اِلَيۡكَ وَمَاۤ اُنۡزِلَ مِنۡ قَبۡلِكَ‌ وَالۡمُقِيۡمِيۡنَ الصَّلٰوةَ‌ وَالۡمُؤۡتُوۡنَ الزَّكٰوةَ وَالۡمُؤۡمِنُوۡنَ بِاللّٰهِ وَالۡيَوۡمِ الۡاٰخِرِ‌ؕ اُولٰٓـئِكَ سَنُؤۡتِيۡهِمۡ اَجۡرًا عَظِيۡمًا ﴿١٦٣﴾

163. එහෙත් ඔවුන් අතුරින් දැනුමෙහි ස්ථිර ලෙස ස්ථාපිත වුවන්ද, විශ්වාසිතයින්ද, ඔබට පහළ කළ දේ කෙරෙහිත්, ඔබට පෙර පහළ කළ දේ කෙරෙහිත් විශ්වාස කරති. තවද (විශේෂයෙන්ම) නැමදුමෙහි නිරතවන්නන්ද, zසකාත් (දුගී බද්ද) ගෙවන්නන්ද, අල්ලාහ් කෙරෙහිත් අවසාන දිනය කෙරෙහිත් විශ්වාස කරන්නන්ද වෙති. මොවුන් හට අපි නියතවශයෙන්ම අතිමහත් තිළිණ දෙන්නෙමු.

---

අරුත්වන්නේ සෑම යුදෙව්වෙක්ම තම මරණයට පෙර ඊසා කෙරෙහි විශ්වාසයක් ඇති කරගන්නා බවයි. මෙම වාදය තහවුරු කල හැක්කේ දෙවියන්ට පමණි. අවාසනාවන්ත ලෙස මේ සාධකයන් සියල්ලෙහි පිළිගැනීමේ බොහෝ ගැටලු හා අර්බුදයන් හරස්වී ඇත. මෙම අර්බුදයන්ට සම්පූර්ණයෙන්ම වෙනස් සහ නව විසඳුමක් අපි යෝජනා කර සිටිමු. මෙම වාක්‍යය අධ්‍යයනය යටතේ පරිවර්තනය කරන ලද්දේ 'තම මරණයට පෙර ඔහු කෙරෙහි විශ්වාසය නියතවශයෙන්ම නොකරන්නාවු (කෙනෙක්) පුස්ථකයේ ජනතාව අතර නොවනු ඇත' ලෙසය.

පහත සඳහන් වාක්‍යයේ තද කළු අකුරින් සඳහන එනම් 'එක්කෙනෙක්' යන්න වචනාර්ථයෙන්ම සඳහන් නොවුන නමුත් වාක්‍යයේ එය අදහස් කරන ලද්දක් පමණි. එය මෙම වාක්‍යය කණ්ඩයේ සඳහන් වුණි නම් මෙසේ අරුත් වනු ඇත. 'වඉන් අහදිම් මින් අහ්ලිල් කිතාබි' ( وَاِنۡ اَحَدٍ مِّنۡ اَهۡلِ الۡكِتٰبِ )

මෙහි කළු අකුරින් දැක්වී ඇති වචනය වාක්‍යයේ එය අදහස් කරන ලද්දක්ය. 'අහද්' (اَحَدٌ) වෙනුවට 'ෆරීක්' (فَرِيۡقٌ) නම් අදහස් කරන ලද වචනයක් ලෙස සලකා බැලිය යුතු බවට අපි යෝජනා කරමු. මේ අනුව එම පරිවර්ථනය විය යුත්තේ 'තම මරණයට පෙර ඔහු(ඊසා) කෙරෙහි විශ්වාසය නොකරන්නාවු නිකායන් හෝ සමූහයක් පුස්ථකයේ ජනතාව අතුරින් නොවෙනු ඇත' යන්නයි.

ඉස්රාඊලයේ නැතිවූ ගෝත්‍රිකයින් විසින් පදිංචි වී සිටි භූමියන් දෙසට ඊසා සංක්‍රමණය කිරීමටත් ඉස්රාඊල් වංශයේ සිටි සියළු ගෝත්‍ර දොළහටම ඔහුගේ පණිවිඩය ප්‍රචාරය කිරීමේ තම මෙහෙය පරිපූර්ණ කිරීමටත් අවශ්‍යතාවයක් මෙයින් ඇති විය. ඊසාගේ අනාවැකිය අනුව ඔහු ඉස්රාඊල් වංශයේ නැතිවූ බැටළුවන් කරා සොයා යන බවට කළ වාදය තවදුරටත් බලවත්ව මෙයින් තහවුරු කරනු ලැබේ. (මතේව් 15:24)

| | |
|---|---|
| *164. නියතවශයෙන්ම නූහ්ටද ඔහුගෙන් පසු දූතයින්ටද අපි දේව අනාවරණය එව්වාක් මෙන්ම අපි ඔබටද දේව අනාවරණය එවා ඇත්තෙමු. තවද ඉබ්රාහීම්ටද, ඉස්මාඊල්ටද, ඉස්හාක්ටද, යඃකූබ් හා (ඔහුගේ) දරුවන්ටද, එමෙන්ම ඊසාටද, අය්යූබ්ටද, යූනුස්ටද, හාරූන්ටද, සුලෙයිමාන්ටද අපි දේව අනාවරණය එවා ඇත්තෙමු. එමෙන්ම අපි දාවූද් හට පුස්තකයක්ද දුනිමු. | اِنَّاۤ اَوۡحَيۡنَاۤ اِلَيۡكَ كَمَاۤ اَوۡحَيۡنَاۤ اِلٰى نُوۡحٍ وَّالنَّبِيّٖنَ مِنۡۢ بَعۡدِهٖ‌ۚ وَاَوۡحَيۡنَاۤ اِلٰۤى اِبۡرٰهِيۡمَ وَاِسۡمٰعِيۡلَ وَاِسۡحٰقَ وَيَعۡقُوۡبَ وَالۡاَسۡبَاطِ وَعِيۡسٰى وَاَيُّوۡبَ وَيُوۡنُسَ وَهٰرُوۡنَ وَسُلَيۡمٰنَ‌ۚ وَاٰتَيۡنَا دَاوٗدَ زَبُوۡرًا ﴿۱۶۴﴾ |
| *165. තවද දැනටමත් අපි ඔබට සඳහන් කළාවූ (සමහර) දූතයින්ද එමෙන්ම අපි ඔබට සඳහන් නොකළාවූ (සමහර) දූතයින්ද (අපි එවා ඇත්තෙමු.) තවද, විශේෂයෙන්ම අල්ලාහ් මූසාට කථා කළේය. | وَرُسُلًا قَدۡ قَصَصۡنٰهُمۡ عَلَيۡكَ مِنۡ قَبۡلُ وَرُسُلًا لَّمۡ نَقۡصُصۡهُمۡ عَلَيۡكَ‌ؕ وَكَلَّمَ اللّٰهُ مُوۡسٰى تَكۡلِيۡمًا‌ۚ ﴿۱۶۵﴾ |
| 166. මේ දූතයින්ගේ (පැමිණීමෙන්) පසු අල්ලාහ්ට එරෙහිව නිදහසට කරුණක් මිනිසුන් හට ඇති නොවනු පිණිස ශුභාරංචි ගෙනෙන්නන් හා අවවාද කරන්නන් වශයෙන් දූතයින් (එවා ඇත්තෙමු.) තවද අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය. | رُسُلًا مُّبَشِّرِيۡنَ وَمُنۡذِرِيۡنَ لِئَلَّا يَكُوۡنَ لِلنَّاسِ عَلَى اللّٰهِ حُجَّةٌ ۢ بَعۡدَ الرُّسُلِ‌ؕ وَكَانَ اللّٰهُ عَزِيۡزًا حَكِيۡمًا ﴿۱۶۶﴾ |
| 167. එහෙත් අල්ලාහ්, ඔහු ඔබ වෙත පහළ කළාවූ දේ (දේව අනාවරණය) මගින්, එය ඔහුගේ දැනුමෙන් (පිරිපුන්ව) ඔහු පහළ කළ බවට සාක්ෂි දරයි. එමෙන්ම සුරදූතයින්(ද) සාක්ෂි දරන්නෝය. සාක්ෂියක් ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය. | لٰـكِنِ اللّٰهُ يَشۡهَدُ بِمَاۤ اَنۡزَلَ اِلَيۡكَ‌ اَنۡزَلَهٗ بِعِلۡمِهٖ‌ۚ وَالۡمَلٰۤـئِكَةُ يَشۡهَدُوۡنَ‌ؕ وَكَفٰى بِاللّٰهِ شَهِيۡدًا ؕ ﴿۱۶۷﴾ |
| 168. අවිශ්වාස කර, අල්ලාහ්ගේ මාර්ගයෙන් (සෙස්සන්ව) වළක්වන අය, නියතවශයෙන්ම බොහෝ දුර නොමග ගොස්ය. | اِنَّ الَّذِيۡنَ كَفَرُوۡا وَصَدُّوۡا عَنۡ سَبِيۡلِ اللّٰهِ قَدۡ ضَلُّوۡا ضَلٰلًاۢ بَعِيۡدًا ﴿۱۶۸﴾ |

* සටහන. 164: 'zසබූර්' (زَبُوْر) යන වචනයට පුස්තකය යන වචනය උත්සහාත්මක පරිවර්ථනයකි. එය (බයිබලයේ) ගිතිකාව වේ.

* සටහන. 165: අරාබි බසෙහි ව්‍යාකරණ විධිය අනුව, මෙම වාක්‍යයෙහි ඇති 'තක්ලීමා' ( تَكْلِيْمًا )යන වචනය 'කල්ලම' ( كَلَّمَ )යන පදයෙහි මූලය නැවත නැවතත් යෙදෙන විට, එය එහි ඇති ගැඹුරුභාවය හෝ නැවත යෙදීම හෝ උසස් තත්ත්වය හෝ සැකය දුරු කිරීම යන්න පෙන්නුම් කිරීමේ අදහසින් කර ඇත. මේ සියලු ලක්ෂණයන් එක්වර වුවද මෙහිදී අදාල විය හැක.

169. නියතවශයෙන්ම ප්‍රතික්ෂේප කර, අසාධාරණ ලෙස කටයුතු කළ අය ගත්කල අල්ලාහ් ඔවුනට ක්ෂමාව නොදෙන්නේය. එමෙන්ම ඔහු ඔවුනට කිසිඳු මගක්ද නොපෙන්වන්නේමය.

إِنَّ الَّذِينَ كَفَرُوا وَظَلَمُوا لَمْ يَكُنِ اللَّهُ لِيَغْفِرَ لَهُمْ وَلَا لِيَهْدِيَهُمْ طَرِيقًا ﴿١٦٩﴾

170. නිරයෙහි මග හැරෙන්නට, එහි ඔවුන් ඉතා දිගු කල් ගෙවනු ඇත. තවද එය අල්ලාහ්ට ඉතා පහසුය.

إِلَّا طَرِيقَ جَهَنَّمَ خَالِدِينَ فِيهَا أَبَدًا ۚ وَكَانَ ذَٰلِكَ عَلَى اللَّهِ يَسِيرًا ﴿١٧٠﴾

171. එම්බල මනුෂ්‍යයිනි! මෙම දූතයාණන් නියතවශයෙන්ම නුඹලා වෙත නුඹලාගේ අධිපතියාණන්ගෙන් සත්‍යය සමඟ පැමිණියේය. එබැවින් නුඹලා විශ්වාස කරනු. (එය) නුඹලාට යහපත් (වනු ඇත). එහෙත් නුඹලා අවිශ්වාස කරන්නේ නම්, සැබැවින්ම අහස්හි හා පොළොවෙහි ඇති සියළු දේද, අල්ලාහ්ට අයත්ය. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නය.

يَا أَيُّهَا النَّاسُ قَدْ جَاءَكُمُ الرَّسُولُ بِالْحَقِّ مِنْ رَبِّكُمْ فَآمِنُوا خَيْرًا لَكُمْ ۚ وَإِنْ تَكْفُرُوا فَإِنَّ لِلَّهِ مَا فِي السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ وَكَانَ اللَّهُ عَلِيمًا حَكِيمًا ﴿١٧١﴾

172. එම්බල පුස්තකයෙහි ජනතාවනි! නුඹලාගේ ආගමෙහි සීමාවන් නොඉක්මවනු. තවද අල්ලාහ් පිළිබඳව සත්‍යය හැරෙන්නට අන් කිසිවක් නොපවසනු. සැබැවින්ම මෙසායා, ඊසා මර්යම්ගේ පුත්, අල්ලාහ්ගේ දූතයෙකු පමණි. එමෙන්ම ඔහු මර්යම්ට පහළ කළ ඔහුගේ වදන (පරිපූර්ණ කිරීමකි). එමෙන්ම ඔහු වෙතින් වූ දයාවකි. එබැවින් අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයින් කෙරෙහිද විශ්වාස කරනු. තවද '(ඔවුන්) තිදෙනෙකි'යි නොකියනු. (එයින්) වැළැකී සිටිනු. (එය) නුඹලාට වඩාත් යහපත්ය. සැබැවින්ම, එකම දෙවියන් අල්ලාහ් පමණි. ඔහුට පුතෙකු සිටීම ඔහුගේ පාරිශුද්ධත්වයට ඉතා දුරස්වූ දෙයකි. අහස්හි ඇති සියළු දේද, පොළොවෙහි ඇති සියළු දේද අල්ලාහ්ට අයත්ය. තවද ආරක්ෂකයෙකු ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය.

يَا أَهْلَ الْكِتَابِ لَا تَغْلُوا فِي دِينِكُمْ وَلَا تَقُولُوا عَلَى اللَّهِ إِلَّا الْحَقَّ ۚ إِنَّمَا الْمَسِيحُ عِيسَى ابْنُ مَرْيَمَ رَسُولُ اللَّهِ وَكَلِمَتُهُ أَلْقَاهَا إِلَىٰ مَرْيَمَ وَرُوحٌ مِنْهُ ۖ فَآمِنُوا بِاللَّهِ وَرُسُلِهِ ۖ وَلَا تَقُولُوا ثَلَاثَةٌ ۚ انْتَهُوا خَيْرًا لَكُمْ ۚ إِنَّمَا اللَّهُ إِلَٰهٌ وَاحِدٌ ۖ سُبْحَانَهُ أَنْ يَكُونَ لَهُ وَلَدٌ ۘ لَهُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۗ وَكَفَىٰ بِاللَّهِ وَكِيلًا ﴿١٧٢﴾

173. නියතවශයෙන්ම මෙසායා, අල්ලාහ්ගේ දාසයෙකු වීම කිසිසේත් සුළු කොට නොසළකන්නේය. (අල්ලාහ්ට) සමීප සුරදූතයින්ද එසේම වෙති. තවද, කවුරුන් හෝ ඔහුට(අල්ලාහ්ට) නමස්කාර කිරීම සුළු කොට සළකා අහංකාර වන්නේද, ඔවුන් සියල්ලන්ව ඔහු තමා වෙතට එක්රැස් කරන්නේය.

لَنْ يَّسْتَنْكِفَ الْمَسِيْحُ اَنْ يَّكُوْنَ عَبْدًا لِّلّٰهِ
وَلَا الْمَلٰٓئِكَةُ الْمُقَرَّبُوْنَ ؕ وَمَنْ يَّسْتَنْكِفْ
عَنْ عِبَادَتِهٖ وَيَسْتَكْبِرْ فَسَيَحْشُرُهُمْ اِلَيْهِ
جَمِيْعًا ﴿١٧٣﴾

174. එවිට, විශ්වාස කර, යහපත් ක්‍රියා කළ අය ගත් කළ, ඔහු ඔවුන්ගේ තිළිණ පූර්ණ වශයෙන් දෙන්නේය, තවද ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුන්ට වැඩියෙන් දෙන්නේය. එහෙත් සුළු කොට සළකා අහංකාර වූ අය ගත් කළ ඔහු ඔවුන්ට වේදනීය දඬුවමක් දෙන්නේය. තවද අල්ලාහ් හැරෙන්නට මිතුරෙකු හෝ උදව්කරුවෙකු ඔවුන්ට නොවනු ඇත.

فَاَمَّا الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ
فَيُوَفِّيْهِمْ اُجُوْرَهُمْ وَيَزِيْدُهُمْ مِّنْ
فَضْلِهٖ ۚ وَاَمَّا الَّذِيْنَ اسْتَنْكَفُوْا وَاسْتَكْبَرُوْا
فَيُعَذِّبُهُمْ عَذَابًا اَلِيْمًا ۙ وَّلَا يَجِدُوْنَ
لَهُمْ مِّنْ دُوْنِ اللّٰهِ وَلِيًّا وَّلَا نَصِيْرًا ﴿١٧٤﴾

175. එම්බල මනුෂ්‍යයිනි, ඇත්තෙන්ම නුඹලාගේ අධිපතියාණන් වෙතින් ප්‍රත්‍යක්ෂ සාධකයක් නුඹලා වෙත පැමිණ ඇත. එමෙන්ම අපි නුඹලා වෙත පැහැදිලි ආලෝකයක්ද පහළ කළෙමු.

يٰۤاَيُّهَا النَّاسُ قَدْ جَآءَكُمْ بُرْهَانٌ مِّنْ
رَّبِّكُمْ وَاَنْزَلْنَاۤ اِلَيْكُمْ نُوْرًا مُّبِيْنًا ﴿١٧٥﴾

176. එබැවින්, අල්ලාහ් කෙරෙහි විශ්වාස කරමින්, ඔහුව තදින් අල්ලාගත් අය ගත් කළ, ඔහු ඇත්තෙන්ම ඔහුගේ දයාව තුළටද, ඔහුගේ කරුණාව තුළටද ඔවුන්ව ඇතුළු කරන්නේය. එමෙන්ම ඔහු වෙතට (ගෙනයන්නාවූ) ඍජු මාර්ගයෙහි ඔවුන්ව යොමුකරන්නේය.

فَاَمَّا الَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ وَاعْتَصَمُوْا بِهٖ
فَسَيُدْخِلُهُمْ فِىْ رَحْمَةٍ مِّنْهُ وَفَضْلٍ ۙ
وَّيَهْدِيْهِمْ اِلَيْهِ صِرَاطًا مُّسْتَقِيْمًا ؕ ﴿١٧٦﴾

177. ඔවුන් ඔබගෙන් උපදෙස් අසති. පවසන්න, අල්ලාහ් නුඹලාට 'කලාලහ්' සම්බන්ධව (ඔහුගේ) උපදෙස් දෙන්නේය. දරුවෙකු නොමැතිව කෙනෙකු මිය යන්නේද, ඔහුට සොහොයුරියක් සිටින්නේ නම්, ඔහු හැර යන දෙයින් අඩක් ඇයට හිමි

يَسْتَفْتُوْنَكَ ؕ قُلِ اللّٰهُ يُفْتِيْكُمْ فِى الْكَلٰلَةِ ؕ
اِنِ امْرُؤٌا هَلَكَ لَيْسَ لَهٗ وَلَدٌ وَّلَهٗۤ
اُخْتٌ فَلَهَا نِصْفُ مَا تَرَكَ ۚ وَهُوَ

يَرِثُهَآ اِنْ لَّمْ يَكُنْ لَّهَا وَلَدٌ ۚ فَاِنْ كَانَتَا
اثْنَتَيْنِ فَلَهُمَا الثُّلُثٰنِ مِمَّا تَرَكَ ۚ
وَاِنْ كَانُوْٓا اِخْوَةً رِّجَالًا وَّنِسَآءً فَلِلذَّكَرِ
مِثْلُ حَظِّ الْاُنْثَيَيْنِ ۚ يُبَيِّنُ اللّٰهُ لَكُمْ
اَنْ تَضِلُّوْا ۚ وَاللّٰهُ بِكُلِّ شَيْءٍ عَلِيْمٌ ﴿١٧٧﴾

වන්නේය. තවද (ඇය මිය යන විටදී) ඇයට දරුවකු නොමැති නම් ඇයගේ භුක්තිය ඔහුට හිමි වන්නේය. එහෙත්, සොහොයුරියන් දෙදෙනෙක් සිටියේ නම්, ඔහු හැරයන දැයින් තුනෙන් දෙකක් ඔවුන්ට හිමි වන්නේය. තවද (උරුමක්කාරයින්) වන ඔවුන් සහෝදර සහෝදරියන්, ස්ත්‍රීන් සහ පුරුෂයින් (දෙදෙනාම) නම් ගැහැණුන් දෙදෙනෙකුගේ ප්‍රමාණය පිරිමියෙකුට ලැබෙන්නේය. නුඹලා නොමග නොයනු පිණිස අල්ලාහ් (මේවා) නුඹලාට විස්තර කරන්නේය. තවද අල්ලාහ් සියලු දේවල් මැනැවින් දන්නේය.




අල් මාඉදාහ්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡۤا اَوۡفُوۡا بِالۡعُقُوۡدِ ؕ اُحِلَّتۡ لَـكُمۡ بَهِيۡمَةُ الۡاَنۡعَامِ اِلَّا مَا يُتۡلٰى عَلَيۡكُمۡ غَيۡرَ مُحِلِّى الصَّيۡدِ وَاَنۡتُمۡ حُرُمٌ ؕ اِنَّ اللّٰهَ يَحۡكُمُ مَا يُرِيۡدُ ۝٢

2. විශ්වාසවන්තයිනි! (නුඹලාගේ) ගිවිසුම් ඉටුකරනු. නුඹලාට ප්‍රකාශ කරනු ලබන්නාවූ දේ හැරෙන්නට, ගවසතුන්ගේ (ගණයට වැටෙන) සිව්පාවුන් නුඹලාට නීත්‍යානුකූල (හලාල්) කොට ඇත. එසේවුවද නුඹලා (ඉහ්රාම්) වන්දනාව හි වස්ත්‍රය ඇඳ සිටින අතරතුරකදී දඩයම් කිරීම නීත්‍යානුකූල (හලාල්) කොට නොමැත. සැබවින්ම අල්ලාහ්, ඔහු අභිමත දේ නියම කරයි.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا لَا تُحِلُّوۡا شَعَآٮِٕرَ اللّٰهِ وَلَا الشَّهۡرَ الۡحَـرَامَ وَلَا الۡهَدۡىَ وَلَا الۡقَلَۤاٮِٕدَ وَلَاۤ آٰمِّيۡنَ الۡبَيۡتَ الۡحَـرَامَ يَبۡتَغُوۡنَ فَضۡلًا مِّنۡ رَّبِّهِمۡ وَرِضۡوَانًا ؕ وَاِذَا حَلَلۡتُمۡ فَاصۡطَادُوۡا ؕ وَلَا يَجۡرِمَنَّكُمۡ شَنَاٰنُ قَوۡمٍ اَنۡ صَدُّوۡكُمۡ عَنِ الۡمَسۡجِدِ الۡحَـرَامِ اَنۡ تَعۡتَدُوۡا ۘ وَتَعَاوَنُوۡا عَلَى الۡبِرِّ وَالتَّقۡوٰى ۖ وَلَا تَعَاوَنُوۡا عَلَى الۡاِثۡمِ وَالۡعُدۡوَانِ ۖ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ شَدِيۡدُ الۡعِقَابِ ۝٣

*3. විශ්වාසවන්තයිනි! අල්ලාහ් විසින් පවිත්‍ර කරනු ලැබූ දේ නොකෙලෙසනු. පරිශුද්ධ වූ මාසය ද පරිත්‍යාගය කිරීම සඳහා රැගෙන ආ සතුන් ද, (කැපකිරීම සඳහා) කරපටියන් (දැමූ සතුන්) ද සිය අධිපතියාණන්ගේ අනුග්‍රහය හා (ඔහුගේ) සොම්නස පතා පරිශුද්ධ නිවෙස වෙත ගමන් ගන්නා අයවද (නොකෙලෙසනු). තවද නුඹලා (ඉහ්රාම් වස්ත්‍රය) ඉවත් කර (ශුද්ධ වූ භූමියෙන් ඉවත් වූවායින් පසු) නුඹලාට දඩයම් කල හැක. යම්කිසි ජනයාගේ ක්‍රෝධය නුඹලාව ශුද්ධ වූ දේවස්ථානය වෙත (යෑමට) බාධා කිරීමේ හේතුවෙන් නුඹලා සීමාව ඉක්මවීමට නොපෙළඹෙත්වා. නුඹලා එකිනෙකාට ධාර්මිෂ්ඨ භාවයෙන්ද භක්තිමත් භාවයෙන්ද උපකාර වනු. නමුත් නුඹලා එකිනෙකාට පාපයෙහි ද සීමාව ඉක්මවීමෙහි ද උපකාර නොවනු. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. නියතවශයෙන්ම අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

حُرِّمَتۡ عَلَيۡكُمُ الۡمَيۡتَةُ وَالدَّمُ وَلَحۡمُ

4. ඉබේම මියගිය (සතෙකුගේ මස්)ද රුධිරයද සූකර මාංශද අල්ලාහ්

*සටහන. 3: නිශ්චිත කාල පරිච්ඡේදයන්ද ස්ථානයන්ද ජීවීන්ද පවිත්‍ර දෑ හි අන්තර්ගත විය හැක.

الْخِنْزِيرِ وَمَا أُهِلَّ لِغَيْرِ اللَّهِ بِهِ وَالْمُنْخَنِقَةُ وَالْمَوْقُوذَةُ وَالْمُتَرَدِّيَةُ وَالنَّطِيحَةُ وَمَا أَكَلَ السَّبُعُ إِلَّا مَا ذَكَّيْتُمْ وَمَا ذُبِحَ عَلَى النُّصُبِ وَأَنْ تَسْتَقْسِمُوا بِالْأَزْلَامِ ۚ ذَٰلِكُمْ فِسْقٌ ۗ الْيَوْمَ يَئِسَ الَّذِينَ كَفَرُوا مِنْ دِينِكُمْ فَلَا تَخْشَوْهُمْ وَاخْشَوْنِ ۚ الْيَوْمَ أَكْمَلْتُ لَكُمْ دِينَكُمْ وَأَتْمَمْتُ عَلَيْكُمْ نِعْمَتِي وَرَضِيتُ لَكُمُ الْإِسْلَامَ دِينًا ۚ فَمَنِ اضْطُرَّ فِي مَخْمَصَةٍ غَيْرَ مُتَجَانِفٍ لِإِثْمٍ ۙ فَإِنَّ اللَّهَ غَفُورٌ رَحِيمٌ ﴿٤﴾

හැර අන් නාමයකින් යදිනු ලැබූ දෙයද ගෙල මිරිකා මරණ ලද දෙයද පහර දෙන ලදුව මියගිය දෙයද වැටී මියගිය දෙයද අං වලින් ඇණ මියගිය දෙයද වන සතෙකු විසින් සපා කන ලද දේ (පණපිටින් සිටියදී) නුඹලා නිසි ලෙස ඝාතනය කිරීමෙන් මිස තිබෙන දෙයද පූජාසනයක බිලි දෙන ලද දෙයද නුඹලාට තහනම් කරන ලදී. (එමෙන්ම) ඊතලවලින් ඉලක්ක කොට පංගුව වෙන්කර ගැනීම (ද තහනම් කරන ලදී). මෙය අකීකරු (ක්‍රියාවක්)ය. මෙදින ප්‍රතික්ෂේප කරන්නන් නුඹලාගේ ධර්මයට (හානි ඇති කිරීමෙහි) බලාපොරොත්තුව සුන් කරගත්හ. එබැවින් නුඹලා ඔවුනට බිය නොවනු. එහෙත් මා හට බිය වනු. මෙදිනෙහි නුඹලා සඳහා මම නුඹලාගේ ධර්මය පරිපූර්ණ කළෙමි. එමෙන්ම නුඹලාට මාගේ අනුග්‍රහය සම්පූර්ණ කර දුනිමි. එමෙන්ම නුඹලාට ධර්මයක් ලෙස ඉස්ලාම් තෝරා ගෙන ඇත්තෙමි. එහෙත් කවුරුන් හෝ සාගින්නෙහි බලපෑමට ලක්වී, පාපය වෙත කැමැත්තෙන් නැඹුරු නොවුයේද, සත්තකින්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

يَسْأَلُونَكَ مَاذَا أُحِلَّ لَهُمْ ۖ قُلْ أُحِلَّ لَكُمُ الطَّيِّبَاتُ ۙ وَمَا عَلَّمْتُمْ مِنَ الْجَوَارِحِ مُكَلِّبِينَ تُعَلِّمُونَهُنَّ مِمَّا عَلَّمَكُمُ اللَّهُ ۖ فَكُلُوا مِمَّا أَمْسَكْنَ عَلَيْكُمْ وَاذْكُرُوا اسْمَ اللَّهِ عَلَيْهِ ۖ وَاتَّقُوا اللَّهَ ۚ إِنَّ اللَّهَ سَرِيعُ الْحِسَابِ ﴿٥﴾

5. ඔවුහු ඔවුනට නීත්‍යානුකූල (හලාල්) කරන ලද දේ කුමක් දැයි ඔබගෙන් අසති. පවසන්න, 'සියලු යහපත් දේවල් නුඹලාට නීත්‍යානුකූල (හලාල්) කරන ලදී'. එමෙන්ම අල්ලාහ් විසින් නුඹලාට උගන්වා දී ඇති දැයින් (නුඹලා වෙනුවෙන් හසු කරගැනීමට) නුඹලා දඩයම් සතුන්ට හා කුරුල්ලන්ට උගන්වා උන්ට පුහුණු කර ඇත. එබැවින් නුඹලා වෙනුවෙන් උන් හසු කර ගත් දේ අනුභව කරනු. තවද එය කෙරෙහි අල්ලාහ්ගේ නාමය උසුරනු. තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. ඇත්තෙන්ම අල්ලාහ් ගණන් ගැනීමෙහි ඉතා සීඝ්‍රය.

اَلْيَوْمَ اُحِلَّ لَكُمُ الطَّيِّبٰتُ ۗ وَطَعَامُ الَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ حِلٌّ لَّكُمْ ۖ وَطَعَامُكُمْ حِلٌّ لَّهُمْ ۖ وَالْمُحْصَنٰتُ مِنَ الْمُؤْمِنٰتِ وَالْمُحْصَنٰتُ مِنَ الَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ مِنْ قَبْلِكُمْ اِذَاۤ اٰتَيْتُمُوْهُنَّ اُجُوْرَهُنَّ مُحْصِنِيْنَ غَيْرَ مُسٰفِحِيْنَ وَلَا مُتَّخِذِيْۤ اَخْدَانٍ ۗ وَمَنْ يَّكْفُرْ بِالْاِيْمَانِ فَقَدْ حَبِطَ عَمَلُهٗ ۖ وَهُوَ فِى الْاٰخِرَةِ مِنَ الْخٰسِرِيْنَ ۝٦

6. මෙදින සියලු යහපත් දේවල් නුඹලා වෙනුවෙන් නිත්‍යානුකූල (හලාල්) කරන ලදී. එමෙන්ම පුස්තකයේ ජනතාවගේ ආහාරද නුඹලාට නිත්‍යානුකූල (හලාල්) කරන ලදී. තවද නුඹලාගේ ආහාරය ඔවුන් සඳහාද නිත්‍යානුකූල (හලාල්) කරන ලදී. විශ්වාසවන්ත පතිවත රකිනා ස්ත්‍රීන්ද, නුඹලාට පෙර පුස්තකය දෙන ලද අය අතුරින් පතිවත රකිනා ස්ත්‍රීන්ද (නුඹලාට අනුමත කරන ලදි) නුඹලා ඔවුන් සඳහා වන දායාදය (මහර්) දී උචිත අන්දමින් විවාහ කර ගත යුතුය. තවද ඔවුන්ව පරදාර සේවිකාව ලෙසද, සොර අඹුවක් ලෙසද නොගත යුතුය. තවද කවරෙකු හෝ විශ්වාසය ප්‍රතික්ෂේප කරන්නේද ඔහුගේ ක්‍රියාව නිසැකයෙන්ම නිෂ්ඵල වූවකි. තවද ඔහු මතුලොවෙහි පාඩු විඳින්නන් අතර කෙනෙකු වන්නේය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِذَا قُمْتُمْ اِلَى الصَّلٰوةِ فَاغْسِلُوْا وُجُوْهَكُمْ وَاَيْدِيَكُمْ اِلَى الْمَرَافِقِ وَامْسَحُوْا بِرُءُوْسِكُمْ وَاَرْجُلَكُمْ اِلَى الْكَعْبَيْنِ ۗ وَاِنْ كُنْتُمْ جُنُبًا فَاطَّهَّرُوْا ۗ وَاِنْ كُنْتُمْ مَّرْضٰۤى اَوْ عَلٰى سَفَرٍ اَوْ جَاۤءَ اَحَدٌ مِّنْكُمْ مِّنَ الْغَاۤىِٕطِ اَوْ لٰمَسْتُمُ النِّسَاۤءَ فَلَمْ تَجِدُوْا مَاۤءً فَتَيَمَّمُوْا صَعِيْدًا طَيِّبًا فَامْسَحُوْا بِوُجُوْهِكُمْ وَاَيْدِيْكُمْ مِّنْهُ ۗ مَا يُرِيْدُ اللّٰهُ لِيَجْعَلَ عَلَيْكُمْ مِّنْ حَرَجٍ وَّلٰكِنْ يُّرِيْدُ لِيُطَهِّرَكُمْ وَلِيُتِمَّ نِعْمَتَهٗ عَلَيْكُمْ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ۝٧

7. එම්බල විශ්වාසවන්තයිනි! නුඹලා නැමදීම සඳහා නැගිටි කල්හි නුඹලාගේ මුහුණු සහ වැළමිට දක්වා නුඹලාගේ අත්ද සෝදා ගනු. එමෙන්ම (තෙමුණු) අත්වලින් නුඹලාගේ හිස් පිසදමා ගනු. එමෙන්ම වළලුකරයන් දක්වා නුඹලාගේ පාදයන්ද (සෝදා ගනු). තවද නුඹලා අපිරිසිදු වූවහොත් (ස්නානය කර) පවිත්‍රවනු. තවද නුඹලා රෝගාතුර වී හෝ ගමනක යෙදී (නුඹලා ද අපිරිසිදුව සිටිය නම්) හෝ එමෙන්ම නුඹලාගෙන් යමෙක් වැසිකිළියේ සිට පැමිණයහොත් හෝ නුඹලා ස්ත්‍රීන් ස්පර්ශ කර ඇත්නම් තවද නුඹලා ජලය නොලදහොත් පිරිසිදු දූවිලි ගෙන එයින් නුඹලාගේ මුහුණු සහ අත් පිස දමා ගනු. අල්ලාහ්, ඔහු නුඹලාව කිසිඳු අපහසුතාවයන්ට පත් කිරීමට කැමති නොවන්නේය. එහෙත් ඔහු නුඹලාව පවිත්‍රවත් කිරීමටද නුඹලා වෙත ඔහුගේ අනුග්‍රහය සම්පූර්ණ කිරීමටද ඔහු කැමැති වන්නේ නුඹලා ඔහුට කෘතඥ වනු පිණිසය.

8. එමෙන්ම නුඹලා වෙත (දැක්වූ) අල්ලාහ්ගේ අනුග්‍රහයද, 'අපි සවන් දුනිමු, අවනත වූවෙමු' යි නුඹලා කී කල්හි ඔහු නුඹලා සමඟ ඇතිකරගත් ඔහුගේ ප්‍රතිඥාවද සිහිපත් කරනු. එමෙන්ම අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. සැබවින්ම සිත්තුළ ඇති දේ අල්ලාහ් මැනැවින් දන්නේය'.

وَاذْكُرُوْا نِعْمَةَ اللّٰهِ عَلَيْكُمْ وَمِيْثَاقَهُ الَّذِىْ وَاثَقَكُمْ بِهٖٓ ۙ اِذْ قُلْتُمْ سَمِعْنَا وَاَطَعْنَا ۖ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ عَلِيْمٌۢ بِذَاتِ الصُّدُوْرِ ﴿٨﴾

9. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් වෙනුවෙන් නුඹලා සාධාරණව සාක්ෂි දරමින් ස්ථිරසාරවනු. යම් ජනකොටසකගේ සතුරුකම නුඹලාව සාධාරණත්වයෙන් කටයුතු නොකිරීමට නොපෙළඹෙත්වා. නුඹලා (සැමවිට) යුක්ති සහගත වනු. එය ධාර්මිෂ්ඨත්වයට ඉතා සමීපය. එමෙන්ම අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. ඇත්තෙන්ම අල්ලාහ් නුඹලා කරන දේ ගැන මැනවින් විමසිලිමත්ය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا كُوْنُوْا قَوّٰمِيْنَ لِلّٰهِ شُهَدَآءَ بِالْقِسْطِ ۖ وَلَا يَجْرِمَنَّكُمْ شَنَاٰنُ قَوْمٍ عَلٰٓى اَلَّا تَعْدِلُوْا ؕ اِعْدِلُوْا ۗ هُوَ اَقْرَبُ لِلتَّقْوٰى ۖ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ خَبِيْرٌۢ بِمَا تَعْمَلُوْنَ ﴿٩﴾

10. විශ්වාස කරමින් යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන්ට, ක්ෂමාවද මහත්වූ තිළිණයද ඔවුන්ට ලැබෙන බව අල්ලාහ් පොරොන්දු දී ඇත්තේය.

وَعَدَ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ ۙ لَهُمْ مَّغْفِرَةٌ وَّاَجْرٌ عَظِيْمٌ ﴿١٠﴾

11. තවද අවිශ්වාස කරමින්, අපගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නන් ගත් කල ඔවුන් නිරයේ වැසියන්ය.

وَالَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَآ اُولٰٓئِكَ اَصْحٰبُ الْجَحِيْمِ ﴿١١﴾

12. එම්බල විශ්වාසිතයිනි! නුඹලා වෙත (දක්වන ලද) අල්ලාහ්ගේ අනුග්‍රහය සිහිපත් කරනු. එනම් එක් පිරිසක් ඔවුන්ගේ අත් නුඹලාට එරෙහිව දිගු කිරීමට අදහස් කළ විට, ඔහු ඔවුන්ගේ අත් නුඹලා වෙනුවෙන් වැළැක්වූයේය. තවද අල්ලාහ් කෙරෙහි බියවනු. විශ්වාසිතයන් අල්ලාහ් කෙරෙහිම විශ්වාසය තැබිය යුතුය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اذْكُرُوْا نِعْمَتَ اللّٰهِ عَلَيْكُمْ اِذْ هَمَّ قَوْمٌ اَنْ يَّبْسُطُوْۤا اِلَيْكُمْ اَيْدِيَهُمْ فَكَفَّ اَيْدِيَهُمْ عَنْكُمْ ۚ وَاتَّقُوا اللّٰهَ ؕ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ﴿١٢﴾ ع

وَلَقَدْ أَخَذَ اللَّهُ مِيثَاقَ بَنِيٓ إِسْرَٰٓءِيلَ وَبَعَثْنَا مِنْهُمُ ٱثْنَيْ عَشَرَ نَقِيبًا ۖ وَقَالَ اللَّهُ إِنِّي مَعَكُمْ ۖ لَئِنْ أَقَمْتُمُ الصَّلَوٰةَ وَءَاتَيْتُمُ الزَّكَوٰةَ وَءَامَنتُم بِرُسُلِي وَعَزَّرْتُمُوهُمْ وَأَقْرَضْتُمُ اللَّهَ قَرْضًا حَسَنًا لَّأُكَفِّرَنَّ عَنكُمْ سَيِّـَٔاتِكُمْ وَلَأُدْخِلَنَّكُمْ جَنَّٰتٍ تَجْرِي مِن تَحْتِهَا ٱلْأَنْهَٰرُ ۚ فَمَن كَفَرَ بَعْدَ ذَٰلِكَ مِنكُمْ فَقَدْ ضَلَّ سَوَآءَ ٱلسَّبِيلِ ﴿١٣﴾

* 13. තවද සත්තකින්ම අල්ලාහ් ඉස්රාඊලයේ දරුවන් වෙතින් එක් ස්ථිර ප්‍රතිඥාවක් ගත්තේය. ඔවුනතුරින් නායකයන් දොළොස් දෙනෙකු අපි පත් කළෙමු. අල්ලාහ් මෙසේ කීවේය. 'ඇත්තෙන්ම මම නුඹලා සමඟ සිටිමි. නුඹලා නමස්කාරය ඉටුකරමින්ද, zසකාත් (දුගී බද්ද) ගෙවමින්ද, මාගේ දූතයන් කෙරෙහි විශ්වාස කරමින්ද, ඔවුනට සහයෝගය දෙමින්ද අල්ලාහ්ට යහපත් අයුරින් ණයක් දෙන්නේ නම්, මම නුඹලාගේ දුෂ්ඨකම් නුඹලාගෙන් ඉවත් කර පහළින් ගලා බස්නා ගංගා සහිත උද්‍යානයන්හි නුඹලාව ඇතුලුකරවන්නෙමි. එහෙත් මින්පසු නුඹලා අතුරින් කවරෙකු හෝ අවිශ්වාස කරන්නේ ද නියතවශයෙන්ම ඔහු දුර්මාර්ගයේ බොහෝ දුර ගොස්ය.

فَبِمَا نَقْضِهِم مِّيثَٰقَهُمْ لَعَنَّٰهُمْ وَجَعَلْنَا قُلُوبَهُمْ قَٰسِيَةً ۖ يُحَرِّفُونَ ٱلْكَلِمَ عَن مَّوَاضِعِهِۦ ۙ وَنَسُوا۟ حَظًّا مِّمَّا ذُكِّرُوا۟ بِهِۦ ۚ وَلَا تَزَالُ تَطَّلِعُ عَلَىٰ خَآئِنَةٍ مِّنْهُمْ إِلَّا قَلِيلًا مِّنْهُمْ ۖ فَٱعْفُ عَنْهُمْ وَٱصْفَحْ ۚ إِنَّ ٱللَّهَ يُحِبُّ ٱلْمُحْسِنِينَ ﴿١٤﴾

14. එසේ ඔවුන් තමන්ගේ ප්‍රතිඥාව කඩකළ හෙයින්, අපි ඔවුනට ශාපකොට ඔවුන්ගේ හදවත් දැඩි කළෙමු. ඔවුහු වචනයන් ඒවායෙහි (නිසි) ස්ථානවලින් විකෘති ලෙස යොදාගනිති. එමෙන්ම ඔවුනට අනුශාසනා කරන ලද දැයින් (සෑහෙන) කොටසක් ඔවුහු අමතක කර දැමූහ. තවද ඔවුන් අතුරින් ස්වල්ප දෙනෙකු හැරෙන්නට ඔවුන්ගෙන් ද්‍රෝහිකම නිරතුරුවම ඔබ දැනගනු ඇත. එහෙයින් ඔවුනට ක්ෂමාව දී ඉවසිලිවන්ත බව දක්වන්න. නියතවශයෙන්ම අල්ලාහ් යහකම් කරනවුන්ව ප්‍රිය කරන්නේය.

* සටහන. 13: 'නකීබ්' යන වදනට ප්‍රමාණවත් සධාරණයක් ඉටු කරන කිසිම වදනක් නොමැති විය හැක. එහි අරුත 'නායකයෙක්' පමණක් නොවන අතර ප්‍රකාශ කරන්නා යන අරුත ද දෙයි. එය ප්‍රකාශය කියවීමට බලය ඇත්තෙක් නැත්නම් රාජ්‍යයක් හෝ වෙනත් උසස් බලධාරීන් වෙනුවෙන් තීන්දුවක් ප්‍රකාශ කරන්නෙක් ද වේ.

*15. තවද 'අපි කිතුනුවන්යැ'යි පවසන අයගෙනුත් ප්‍රතිඥාවන් අපි ලබා ගත්තෙමු. එහෙත් ඔවුනට අනුශාසනා කරන ලද දැයින් (සෑහෙන) කොටසක් ඔවුහු අමතක කරදැමූහ. එබැවින් අපි ඔවුනතර ක්‍රෝධයත්, වෛරයත් පුනරුත්ථාන දිනය තෙක් ඇතිවීමට සැලැස්වීමු. ඔවුන් කරමින් සිටි දේ පිළිබඳව අල්ලාහ් ඔවුනට ඉක්මනින් දන්වන්නේය.

وَمِنَ الَّذِينَ قَالُوٓا إِنَّا نَصَٰرَىٰٓ أَخَذْنَا
مِيثَٰقَهُمْ فَنَسُوا حَظًّا مِّمَّا ذُكِّرُوا بِهِۦ
فَأَغْرَيْنَا بَيْنَهُمُ الْعَدَاوَةَ وَالْبَغْضَآءَ إِلَىٰ
يَوْمِ الْقِيَٰمَةِ ۚ وَسَوْفَ يُنَبِّئُهُمُ اللَّهُ بِمَا كَانُوا
يَصْنَعُونَ ﴿١٥﴾

16. එම්බල පුස්තකයෙහි ජනතාවනි! අපගේ දූතයා නුඹලා වෙත පැමිණ ඇත්තේය. නුඹලා පුස්තකයෙන් සැඟවූ බොහෝ දේවල් ඔහු නුඹලාට හෙළිදරව් කරයි. බොහෝ දේවලට සමාව දෙයි. ඇත්තෙන්ම නුඹලාට අල්ලාහ් වෙතින් ආලෝකයක් ද, ඉතා පැහැදිලි පුස්තකයක් ද පැමිණ ඇත.

يَٰٓأَهْلَ الْكِتَٰبِ قَدْ جَآءَكُمْ رَسُولُنَا يُبَيِّنُ
لَكُمْ كَثِيرًا مِّمَّا كُنتُمْ تُخْفُونَ مِنَ الْكِتَٰبِ
وَيَعْفُوا عَن كَثِيرٍ ۚ قَدْ جَآءَكُم مِّنَ اللَّهِ
نُورٌ وَكِتَٰبٌ مُّبِينٌ ﴿١٦﴾

17. මෙමගින් අල්ලාහ්, ඔහුගේ සොම්නස පතන්නන්ව සාමයේ මංවලට යොමු කරන්නේය. තවද ඔහුගේ නියමයෙන් ඔවුන්ව සියළු (වර්ගයේ) අන්ධකාරයන්ගෙන් ආලෝකය වෙතට ගෙන එන්නේය. තවද ඔවුන්ව ඍජු මාර්ගය වෙත යොමු කරන්නේය.

يَهْدِى بِهِ اللَّهُ مَنِ اتَّبَعَ رِضْوَٰنَهُۥ سُبُلَ
السَّلَٰمِ وَيُخْرِجُهُم مِّنَ الظُّلُمَٰتِ إِلَى النُّورِ
بِإِذْنِهِۦ وَيَهْدِيهِمْ إِلَىٰ صِرَٰطٍ مُّسْتَقِيمٍ ﴿١٧﴾

18. 'නිසැකවම මරියම්ගේ පුත් මෙසායා, අල්ලාහ් මිස අන්කිසිවෙකු නොවේ' යැයි පවසන්නන් සැබවින්ම අවිශ්වාස කර ඇත්තාහ. පවසන්න, 'මර්යම්ගේ පුත් මෙසායාවද, ඔහුගේ මෑණියන්වද පොළොවෙහි වූ සියල්ලන්ද නැති කිරීමට ඔහු(අල්ලාහ්) කැමති වුවහොත් අල්ලාහ්ට එරෙහිව බලය ඇත්තේ කවරෙකුටද?' තවද අහස් හා

لَقَدْ كَفَرَ الَّذِينَ قَالُوٓا إِنَّ اللَّهَ هُوَ الْمَسِيحُ
ابْنُ مَرْيَمَ ۚ قُلْ فَمَن يَمْلِكُ مِنَ اللَّهِ شَيْـًٔا
إِنْ أَرَادَ أَن يُهْلِكَ الْمَسِيحَ ابْنَ مَرْيَمَ
وَأُمَّهُۥ وَمَن فِى الْأَرْضِ جَمِيعًا ۗ وَلِلَّهِ

---

*සටහන. 15: 'අග්:රයිනා' ( أَغْرَيْنَا )යන අරාබි වදනෙහි මූලික අරුත වන්නේ යම් කිසිවක් තවත් දෙයක් සමග දැඩි ලෙස ඇලී ගැලී සිටීමය. එම නිසා එය එහි අනෙක් කොටසත් සමග වෙන්කළ නොහැක්කක් බවට පත්වේ. එබැවින් මෙම පරිවර්ථනයට අප කැමති වන්නේ මෙසේය. 'එකිනෙකා අතර වෙලී ඇති ඔවුන් සමූහයේ ක්‍රෝධයත්, වෛරයත් පුනරුත්ථාන දිනය තෙක් ඇතිවීමට සැලැස්වීමු.'

مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَيْنَهُمَا ؕ يَخْلُقُ مَا يَشَآءُ ؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ﴿۱۸﴾

පොළවෙහි මෙන්ම ඒ අතර වූ දැයෙහි රාජ්‍යය අල්ලාහ්ට හිමිවේ. ඔහු තමා කැමැති දේ මවන්නේය. එමෙන්ම අල්ලාහ් සියළු දේ කිරීමට බලසම්පන්නය.

وَقَالَتِ الْيَهُوْدُ وَالنَّصٰرٰى نَحْنُ اَبْنٰٓؤُا اللّٰهِ وَاَحِبَّآؤُهٗ ؕ قُلْ فَلِمَ يُعَذِّبُكُمْ بِذُنُوْبِكُمْ ؕ بَلْ اَنْتُمْ بَشَرٌ مِّمَّنْ خَلَقَ ؕ يَغْفِرُ لِمَنْ يَّشَآءُ وَيُعَذِّبُ مَنْ يَّشَآءُ ؕ وَلِلّٰهِ مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَيْنَهُمَا ۫ وَاِلَيْهِ الْمَصِيْرُ ﴿۱۹﴾

19. යුදෙව්වන් සහ කිතුනුවන් 'අපි අල්ලාහ්ගේ පුත්‍රයාණන්ද, ඔහුගේ සෙනෙහවන්තයන්ද, වෙමු'යි කියති. පවසන්න, 'එසේනම් නුඹලාගේ පව්වලට ඔහු නුඹලාට දඬුවම් දෙන්නේ කුමක් නිසාද?' එසේ නොව, නුඹලාද, ඔහු මවා ඇති අය අතුරින් මනුෂ්‍යයන් (පමණක්)ය.' ඔහු තමා කැමති අයට සමාව දෙන අතර ඔහු තමා කැමැති අයට දඬුවම් දෙන්නේය. අහස් හා පොළවෙහි මෙන්ම ඒ අතර වූ දැයෙහි රාජ්‍යය අල්ලාහ්ට හිමිවේ. එමෙන්ම ආපසු පැමිණිය යුතු වන්නේ ඔහු වෙතමය.

يٰۤاَهْلَ الْكِتٰبِ قَدْ جَآءَكُمْ رَسُوْلُنَا يُبَيِّنُ لَكُمْ عَلٰى فَتْرَةٍ مِّنَ الرُّسُلِ اَنْ تَقُوْلُوْا مَا جَآءَنَا مِنْۢ بَشِيْرٍ وَّلَا نَذِيْرٍ ۫ فَقَدْ جَآءَكُمْ بَشِيْرٌ وَّنَذِيْرٌ ؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ﴿۲۰﴾

20. එම්බල පුස්තකයේ ජනතාවනි! 'අප වෙත ශුභාරංචි ගෙනෙන්නෙකු හෝ අවවාද කරන්නෙකු හෝ නොපැමිණියේ යැ'යි නුඹලා නොකියනු පිණිස දූතයින්ගේ (අනුක්‍රමයෙහි) නැවතුමකට පසු නුඹලාට (දේවලේ) පැහැදිලි කර දෙන්නාවූ අපගේ දූතයෙකු නුඹලා වෙත පැමිණ ඇත්තේය. එබැවින් ශුභාරංචි ගෙනෙන්නෙකු ද, අවවාද කරන්නෙකු ද ඇත්තෙන්ම නුඹලා වෙත පැමිණ ඇත්තේය. අල්ලාහ් සියළු දේ කිරීමට බලසම්පන්නය.

وَاِذْ قَالَ مُوْسٰى لِقَوْمِهٖ يٰقَوْمِ اذْكُرُوْا نِعْمَةَ اللّٰهِ عَلَيْكُمْ اِذْ جَعَلَ فِيْكُمْ اَنْۢبِيَآءَ وَجَعَلَكُمْ مُّلُوْكًا ۖۗ وَّاٰتٰىكُمْ مَّا لَمْ يُؤْتِ اَحَدًا مِّنَ الْعٰلَمِيْنَ ﴿۲۱﴾

*21. තවද 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ් නුඹලා අතුරින් චක්තෘවරුන් පත්කොට, නුඹලාව රජවරුන් කර, තවද ඔහු මුළු ලොවෙහි කිසිවෙකුටත් නොදුන්නාවූ දේ නුඹලාට පිරිනැමූ කල්හි නුඹලා වෙත වූ අල්ලාහ්ගේ අනුග්‍රහය සිහිපත් කරනු'යි මූසා තම ජනතාවට කියූ අවස්ථාව (සිහිපත් කරනු.)

*සටහන. 21: 'මුළු ලොව' යන වචනය අදාළ වන්නේ එම යුගයේ ජීවත් වූ ජනතාවට පමණි.

22. 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ් නුඹලාට නියම කළාවූ පරිශුද්ධ භූමියට ඇතුළු වනු. තවද නුඹලා ආපසු නොහැරෙනු. නැතහොත් නුඹලා පාඩු විඳින්නන් ලෙස හැරෙන්නෙහුය'.

يٰقَوْمِ ادْخُلُوا الْاَرْضَ الْمُقَدَّسَةَ الَّتِىْ كَتَبَ اللّٰهُ لَكُمْ وَلَا تَرْتَدُّوْا عَلٰٓى اَدْبَارِكُمْ فَتَنْقَلِبُوْا خٰسِرِيْنَ ﴿٢٢﴾

23. ඔවුහු 'එම්බල මූසා! එහි (භූමියෙහි) නොහික්මුණු බලසම්පන්න ජනතාවක් වේ. ඔවුන් එතැනින් පිට නොවන තුරු අපි එහි ඇතුළු නොවන්නෙමු. එහෙත් ඔවුන් එතැනින් පිටව ගියහොත් ඇත්තෙන්ම අපි ඇතුළු වන්නෙමු' යි කීහ.

قَالُوْا يٰمُوْسٰٓى اِنَّ فِيْهَا قَوْمًا جَبَّارِيْنَ ۖ وَاِنَّا لَنْ نَّدْخُلَهَا حَتّٰى يَخْرُجُوْا مِنْهَا ۚ فَاِنْ يَّخْرُجُوْا مِنْهَا فَاِنَّا دٰخِلُوْنَ ﴿٢٣﴾

24. එවිට (අල්ලාහ්ට) බියවූවන්ගෙන්, අල්ලාහ්, ඔහුගේ අනුග්‍රහය දක්වා ඇති මනුෂ්‍යයන් දෙදෙනෙක් මෙසේ කීහ. 'නුඹලා ඔවුනට එරෙහිව (ඉදිරියට ගොස්) එම දොරටුවෙන් ඇතුළු වනු. නුඹලා එහි ඇතුළුවූවහොත්, එවිට නිසැකවම නුඹලා ජයග්‍රාහී වන්නෙහුය. නුඹලා විශ්වාසිතයින් නම්, අල්ලාහ් කෙරෙහි විශ්වාසය තබනු'.

قَالَ رَجُلٰنِ مِنَ الَّذِيْنَ يَخَافُوْنَ اَنْعَمَ اللّٰهُ عَلَيْهِمَا ادْخُلُوْا عَلَيْهِمُ الْبَابَ ۚ فَاِذَا دَخَلْتُمُوْهُ فَاِنَّكُمْ غٰلِبُوْنَ ۚ وَعَلَى اللّٰهِ فَتَوَكَّلُوْٓا اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ﴿٢٤﴾

25. එයට 'එම්බල මූසා! ඔවුන් එහි රැඳී සිටින තෙක් අපි එහි කිසිසේත් ඇතුළු නොවන්නෙමු. එහෙයින් ඔබද ඔබගේ අධිපතියාණන්ද ගොස් සටන් කරනු. (තවද) අපි මෙහි හිඳිමු'යි ඔවුහු කීහ.

قَالُوْا يٰمُوْسٰٓى اِنَّا لَنْ نَّدْخُلَهَآ اَبَدًا مَّا دَامُوْا فِيْهَا فَاذْهَبْ اَنْتَ وَرَبُّكَ فَقَاتِلَآ اِنَّا هٰهُنَا قٰعِدُوْنَ ﴿٢٥﴾

26. 'මාගේ අධිපතියාණෙනි! මා සහ මාගේ සහෝදරයා හැරෙන්නට අන් කිසිවෙකු කෙරෙහි මාහට බලයක් නොමැත. එහෙයින් අප සහ කැරලිකාර පිරිස අතර වෙනස්කමක් ඇති කරනු මැනව' යි ඔහු කීය.

قَالَ رَبِّ اِنِّىْ لَآ اَمْلِكُ اِلَّا نَفْسِىْ وَاَخِىْ فَافْرُقْ بَيْنَنَا وَبَيْنَ الْقَوْمِ الْفٰسِقِيْنَ ﴿٢٦﴾

27. 'ඇත්තෙන්ම එය ඔවුන්ට සතලිස් වසරකට තහනම් කරනු ලබන්නේය. ඔවුහු භූමියෙහි සිත් වියවුල්භාවයෙන් සැරිසරන්නෝය. එහෙයින්

قَالَ فَاِنَّهَا مُحَرَّمَةٌ عَلَيْهِمْ اَرْبَعِيْنَ سَنَةً ۚ يَتِيْهُوْنَ فِى الْاَرْضِ ۗ فَلَا تَاْسَ عَلَى

الْقَوْمِ الْفٰسِقِيْنَ ﴿٢٧﴾

කැරැලිකාර පිරිස පිළිබඳව දුක් නොවන්නැ'යි (දෙවියන්) පැවසීය.

وَاتْلُ عَلَيْهِمْ نَبَاَ ابْنَيْ اٰدَمَ بِالْحَقِّ ۘ اِذْ قَرَّبَا قُرْبَانًا فَتُقُبِّلَ مِنْ اَحَدِهِمَا وَلَمْ يُتَقَبَّلْ مِنَ الْاٰخَرِ ؕ قَالَ لَاَقْتُلَنَّكَ ؕ قَالَ اِنَّمَا يَتَقَبَّلُ اللّٰهُ مِنَ الْمُتَّقِيْنَ ﴿٢٨﴾

28. ඔබ ආදම්ගේ පුතණුවන් දෙදෙනෙකුගේ සැබෑ කථාව ඔවුනට කියාදෙන්න. එවිට ඔවුන් දෙදෙනා (එක් එක්) පරිත්‍යාගයක් දුන් කල්හි ඔවුන්ගෙන් එක් කෙනෙකුගේ එය පිළිගන්නා ලදී. තවද අනෙකාගේ පිළිනොගන්නා ලදී. පසු තැනැත්තා, 'මම සත්තකින්ම නුඹව ඝාතනය කරමි'යි කීය. එයට, පෙර තැනැත්තා, 'ධාර්මිෂ්ඨකයින්ගෙන් පමණක් අල්ලාහ් පිළිගන්නේයැ'යි පිළිතුරු දුන්නේය.

لَئِنْۢ بَسَطْتَّ اِلَيَّ يَدَكَ لِتَقْتُلَنِيْ مَاۤ اَنَا بِبَاسِطٍ يَّدِيَ اِلَيْكَ لِاَقْتُلَكَ ۚ اِنِّيْۤ اَخَافُ اللّٰهَ رَبَّ الْعٰلَمِيْنَ ﴿٢٩﴾

29. 'නුඹ මා ඝාතනය කිරීමට නුඹගේ අත මට එරෙහිව දික්කළා වුවද මා නුඹව ඝාතනය කිරීමට මාගේ අත නුඹට එරෙහිව දික් නොකරන්නෙමි. මම සර්ව ලෝකයේ අධිපතියාණන් වන අල්ලාහ්ටම බිය වෙමි'.

اِنِّيْۤ اُرِيْدُ اَنْ تَبُوْٓاَ بِاِثْمِيْ وَاِثْمِكَ فَتَكُوْنَ مِنْ اَصْحٰبِ النَّارِ ۚ وَذٰلِكَ جَزٰٓؤُا الظّٰلِمِيْنَ ﴿٣٠﴾

30. 'නුඹ නුඹගේ පාපයත් මාගේ පාපයත් ඉසිලිය යුතුය. එහෙයින් නුඹ ගින්නෙහි සහකරුවන් අතර සිටීමට මා කැමැති වෙමි. එමෙන්ම එය වරදකරුවන්ගේ ප්‍රතිවිපාකය වේ'.

فَطَوَّعَتْ لَهٗ نَفْسُهٗ قَتْلَ اَخِيْهِ فَقَتَلَهٗ فَاَصْبَحَ مِنَ الْخٰسِرِيْنَ ﴿٣١﴾

31. එහෙත් තමාගේ සහෝදරයාව ඝාතනය කිරීමට ඔහුගේ සිත ඔහුව පොළඹවීය. එබැවින් හෙතෙම ඔහුව ඝාතනය කළේය. තවද පාඩු විඳින්නන්ගෙන් කෙනෙකු බවට පත්විය.

فَبَعَثَ اللّٰهُ غُرَابًا يَّبْحَثُ فِي الْاَرْضِ لِيُرِيَهٗ كَيْفَ يُوَارِيْ سَوْءَةَ اَخِيْهِ ؕ قَالَ يٰوَيْلَتٰۤى اَعَجَزْتُ اَنْ اَكُوْنَ مِثْلَ هٰذَا

32. එවිට තම සහෝදරයාගේ මළසිරුර සඟවා තබන්නේ කෙසේදැයි ඔහුට පෙන්වන්නට පොළොව පහුරු ගසන දෝණ කපුටෙකුව අල්ලාහ් යැව්වේය. 'අහෝ මාගේ දුකකි! මාගේ සොහොයුරාගේ මළමිනිය මා වසා තැබීමට මෙම කපුටා මෙන් මට නොහැකි වූයේ

الْغُرَابِ فَأُوَارِيَ سَوْءَةَ أَخِي ۖ فَأَصْبَحَ مِنَ النَّادِمِينَ ﴿٣٢﴾

දැ?'යි ඔහු කිවේය. තවද එහෙයින් ඔහු කණගාටුවට පත් වූවෙකු විය.

مِنْ أَجْلِ ذَٰلِكَ كَتَبْنَا عَلَىٰ بَنِي إِسْرَائِيلَ أَنَّهُ مَنْ قَتَلَ نَفْسًا بِغَيْرِ نَفْسٍ أَوْ فَسَادٍ فِي الْأَرْضِ فَكَأَنَّمَا قَتَلَ النَّاسَ جَمِيعًا وَمَنْ أَحْيَاهَا فَكَأَنَّمَا أَحْيَا النَّاسَ جَمِيعًا ۚ وَلَقَدْ جَاءَتْهُمْ رُسُلُنَا بِالْبَيِّنَاتِ ثُمَّ إِنَّ كَثِيرًا مِنْهُمْ بَعْدَ ذَٰلِكَ فِي الْأَرْضِ لَمُسْرِفُونَ ﴿٣٣﴾

33. මෙම හේතුව නිසා, යමෙකුව ඝාතනය කිරීම වෙනුවෙන් හෝ පොළොවෙහි කෝලාහල ඇතිකිරීම වෙනුවෙන් හෝ මිස කවරෙකු හෝ යමෙකුව ඝාතනය කර ඇත්තේ නම් ඔහු මුළු මිනිස් සංහතියම ඝාතනය කළාක් වැනි යැයිද, කවරෙකු හෝ යමෙකුට ජීවය ලබා දුන්නේ නම් ඔහු මුළු මිනිස් සංහතියටම ජීවය ලබා දුන්නාක් වැනි යැයිද අපි ඉස්රාඊලයේ දරුවන්ට නියම කළෙමු. එමෙන්ම අපගේ දූතයන් ඔවුන් වෙත පැහැදිලි සළකුණු සහිතව පැමිණියහ. එහෙත් මින් පසුවද ඔවුන්ගෙන් විශාල පිරිසක් පොළොවෙහි සීමාව ඉක්මවන්නට වූහ.

إِنَّمَا جَزَاءُ الَّذِينَ يُحَارِبُونَ اللَّهَ وَرَسُولَهُ وَيَسْعَوْنَ فِي الْأَرْضِ فَسَادًا أَنْ يُقَتَّلُوا أَوْ يُصَلَّبُوا أَوْ تُقَطَّعَ أَيْدِيهِمْ وَأَرْجُلُهُمْ مِنْ خِلَافٍ أَوْ يُنْفَوْا مِنَ الْأَرْضِ ۚ ذَٰلِكَ لَهُمْ خِزْيٌ فِي الدُّنْيَا ۖ وَلَهُمْ فِي الْآخِرَةِ عَذَابٌ عَظِيمٌ ﴿٣٤﴾

34. අල්ලාහ් සමගද ඔහුගේ දූතයාණන් සමගද සටන් කරමින්, එමෙන්ම පොළොවෙහි කෝලාහල ඇතිකිරීමට ප්‍රයත්න දරන අයවලුන්හට ප්‍රතිවිපාකය නම්, ඔවුන්ව ඝාතනය කරනු ලැබීමය. නැතහොත් කුරුසයේ දඬුවම දිය යුතුය. නැතහොත් ඔවුන්ගේ අත් හා ඔවුන්ගේ පා ඒකාන්තරව කපා දමනු ලැබිය යුතුය. නැතහොත් ඔවුන්ව දේශයෙන් නෙරපා දමනු ලැබිය යුතුය. මෙය මෙලොවෙහි ඔවුන් සඳහා වූ නින්දාවකි. එමෙන්ම පරලොවෙහිදී ද ඔවුන් සඳහා මහත් දඬුවමක් ඇත්තේය.

إِلَّا الَّذِينَ تَابُوا مِنْ قَبْلِ أَنْ تَقْدِرُوا عَلَيْهِمْ ۖ فَاعْلَمُوا أَنَّ اللَّهَ غَفُورٌ رَحِيمٌ ﴿٣٥﴾

35. නුඹලා ඔවුන්ව නුඹලාගේ ආධිපත්‍යය යටතේ ගෙන ඒමට පෙරාතුව, පශ්චාත්තාප වූ අයවලුන් හැරෙන්නටය. ඇත්තෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබර යැයි දැනගනු.

36. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද ඔහු දෙසට සමීපවීමේ මාර්ගය සොයනු. තවද නුඹලා ජය ලැබීම පිණිස ඔහුගේ මගෙහි පරිශ්‍රමය දරනු.

يَٰٓأَيُّهَا الَّذِينَ ءَامَنُوا اتَّقُوا اللَّهَ وَابْتَغُوٓا إِلَيْهِ الْوَسِيلَةَ وَجَٰهِدُوا فِي سَبِيلِهِۦ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿٣٦﴾

37. නියතවශයෙන්ම අවිශ්වාසිතයින් සතු මහ පොළොවෙහි ඇති සියලු දේ හා එවැනි වූ තවත් කොටසක් ඔවුන් සතු වුවද ඒවා ඔවුන් පුනරුත්ථාන දිනයේ දඬුවමට වන්දියක් වශයෙන් දුන්නද, ඒවා ඔවුන්ගෙන් පිළිගනු නොලබන්නේය. එමෙන්ම ඔවුනට වේදනාකාරී දඬුවමක් ලැබෙනු ඇත.

إِنَّ الَّذِينَ كَفَرُوا لَوْ أَنَّ لَهُم مَّا فِي الْأَرْضِ جَمِيعًا وَمِثْلَهُۥ مَعَهُۥ لِيَفْتَدُوا بِهِۦ مِنْ عَذَابِ يَوْمِ الْقِيَٰمَةِ مَا تُقُبِّلَ مِنْهُمْ ۖ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿٣٧﴾

38. ඔවුහු ගින්නෙන් පිටත්වීමට කැමති වන්නෝය. නමුත් ඔවුන්ට එයින් පිටත්වීමට නොහැකිය. එමෙන්ම ඔවුනට ස්ථිර වූ දඬුවමක් ඇත.

يُرِيدُونَ أَن يَخْرُجُوا مِنَ النَّارِ وَمَا هُم بِخَٰرِجِينَ مِنْهَا ۖ وَلَهُمْ عَذَابٌ مُّقِيمٌ ﴿٣٨﴾

39. සොරකම් කරන්නාවූ පුරුෂයෙකු සහ සොරකම් කරන්නාවූ ස්ත්‍රියකු යන දෙදෙනාගේ අත්, ඔවුන් කළ වරදේ විපාකයක් වශයෙන්ද අල්ලාහ් වෙතින් වූ ආදර්ශමත් දඬුවමක් වශයෙන්ද කපා දමනු. එමෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය.

وَالسَّارِقُ وَالسَّارِقَةُ فَاقْطَعُوٓا أَيْدِيَهُمَا جَزَآءًۢ بِمَا كَسَبَا نَكَٰلًا مِّنَ اللَّهِ ۗ وَاللَّهُ عَزِيزٌ حَكِيمٌ ﴿٣٩﴾

40. යමෙකු සිය පාප ක්‍රියාවෙන් පසු පසුතැවිලිවී එය නිවරැදි කරගත්තේ නම්, ඇත්තෙන්ම අල්ලාහ් දයාවෙන් යුතුව ඔහු වෙතට හැරෙන්නේය. ඇත්තෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

فَمَن تَابَ مِنۢ بَعْدِ ظُلْمِهِۦ وَأَصْلَحَ فَإِنَّ اللَّهَ يَتُوبُ عَلَيْهِ ۗ إِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٤٠﴾

41. අල්ලාහ්, ඔහුට අහස් මෙන්ම පොළොවෙහි රාජ්‍යය සතු බව ඔබ නොදන්නෙහිද? ඔහු කැමති කෙනෙකුට ඔහු දඬුවම් දෙන්නේය. තවද ඔහු කැමති කෙනෙකුට සමාව දෙන්නේය. එමෙන්ම අල්ලාහ් සියළු දේ කිරීමට බලසම්පන්නය.

أَلَمْ تَعْلَمْ أَنَّ اللَّهَ لَهُۥ مُلْكُ السَّمَٰوَٰتِ وَالْأَرْضِ يُعَذِّبُ مَن يَشَآءُ وَيَغْفِرُ لِمَن يَشَآءُ ۗ وَاللَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٤١﴾

يَٰٓأَيُّهَا ٱلرَّسُولُ لَا يَحۡزُنكَ ٱلَّذِينَ يُسَٰرِعُونَ فِي ٱلۡكُفۡرِ مِنَ ٱلَّذِينَ قَالُوٓاْ ءَامَنَّا بِأَفۡوَٰهِهِمۡ وَلَمۡ تُؤۡمِن قُلُوبُهُمۡۛ وَمِنَ ٱلَّذِينَ هَادُواْۛ سَمَّٰعُونَ لِلۡكَذِبِ سَمَّٰعُونَ لِقَوۡمٍ ءَاخَرِينَ لَمۡ يَأۡتُوكَۖ يُحَرِّفُونَ ٱلۡكَلِمَ مِنۢ بَعۡدِ مَوَاضِعِهِۦۖ يَقُولُونَ إِنۡ أُوتِيتُمۡ هَٰذَا فَخُذُوهُ وَإِن لَّمۡ تُؤۡتَوۡهُ فَٱحۡذَرُواْۚ وَمَن يُرِدِ ٱللَّهُ فِتۡنَتَهُۥ فَلَن تَمۡلِكَ لَهُۥ مِنَ ٱللَّهِ شَيۡـًٔاۚ أُوْلَٰٓئِكَ ٱلَّذِينَ لَمۡ يُرِدِ ٱللَّهُ أَن يُطَهِّرَ قُلُوبَهُمۡۚ لَهُمۡ فِي ٱلدُّنۡيَا خِزۡيٞۖ وَلَهُمۡ فِي ٱلۡأٓخِرَةِ عَذَابٌ عَظِيمٞ ٤٢

معانقة ٣ عند المتقدمين

42. දූතයාණෙනි! තමන්ගේ හදවත් විශ්වාස නොකොට 'අපි විශ්වාස කළෙමු'යි තමන්ගේ මුවින් පවසන අවිශ්වාසයෙහි කඩිනමින්ම ගමන් ගන්නා අයවලුන් ඔබව කනස්සල්ලට පත් නොකරත්වා. මුසාවන්ට ඉතා ඕනෑකමින් සවන් දෙන සමහරුන් යුදෙව්වන් අතරද වෙති. ඔවුන් එය අසන්නේ ඔබ වෙත නොපැමිණි අන් ජනතාවට එය දැන්වීම පිණිසය. වචනයන් නියමිත ස්ථානයන් හි තබන ලද්දායින් පසු ඔවුන් එය විකෘති කරති. තවද 'නුඹලාට මෙය දෙනු ලැබුවහොත් මෙය භාරගනු. නුඹලාට මෙය දෙනු නොලැබුවහොත් එවිට ප්‍රවේසම් වනුයි!'යි ඔවුහු කියති. තවද අල්ලාහ් යමෙකුව පිරික්සීමට කැමැති වුවහොත් එය වළක්වාලීමට ඔහු වෙනුවෙන් අල්ලාහ්ට එරෙහිව ඔබට කිසිවක් කළ නොහැකිය. ඔවුන් මේ අයය, මොවුන්ගේ හදවත් අල්ලාහ් පරිශුද්ධ කිරීමට කැමැති නොවුයේය. මොවුන් සඳහා මෙලොවෙහි නින්දාව ලැබෙනු ඇත. එමෙන්ම මොවුන්ට පරලොවෙහිදී දැඩිවූ දඬුවමක් ද ඇත.

سَمَّٰعُونَ لِلۡكَذِبِ أَكَّٰلُونَ لِلسُّحۡتِۚ فَإِن جَآءُوكَ فَٱحۡكُم بَيۡنَهُمۡ أَوۡ أَعۡرِضۡ عَنۡهُمۡۖ وَإِن تُعۡرِضۡ عَنۡهُمۡ فَلَن يَضُرُّوكَ شَيۡـٔٗاۖ وَإِنۡ حَكَمۡتَ فَٱحۡكُم بَيۡنَهُم بِٱلۡقِسۡطِۚ إِنَّ ٱللَّهَ يُحِبُّ ٱلۡمُقۡسِطِينَ ٤٣

43. ඔවුහු මුසාවන්ට ඉතා ඕනෑකමින් සවන් දෙති. තහනම් කළ දේවල් ගිල දමන්නන්ය. එබැවින් (විනිශ්වය සඳහා) ඔවුන් ඔබ වෙත පැමිණියහොත්, ඔබ ඔවුන් අතර විනිශ්වය කරන්න. නැතහොත් ඔවුන්ගෙන් ඉවත්වන්න. ඔබ ඔවුන්ගෙන් ඉවත්ව සිටියහොත් ඔබට කිසිඳු හානියක් කිරීමට ඔවුන්ට නුපුළුවන. තවද ඔබ විනිශ්වය කරන්නේ නම් ඔවුන් අතර යුක්තිසහගතව විනිශ්වය කරන්න. ඇත්තෙන්ම යුක්තිය ඉටු කරන්නන්ව අල්ලාහ් ප්‍රිය කරයි.

وَكَيْفَ يُحَكِّمُونَكَ وَعِنْدَهُمُ التَّوْرَاةُ فِيهَا حُكْمُ اللَّهِ ثُمَّ يَتَوَلَّوْنَ مِنْ بَعْدِ ذَٰلِكَ ۚ وَمَا أُولَٰئِكَ بِالْمُؤْمِنِينَ ﴿٤٤﴾

44. ඔවුන් වෙත අල්ලාහ්ගේ විනිශ්චය සහිත තව්රාත් ඔවුන් සතුව තිබියදී, ඔවුන් ඔබව (තමන්ගේ) විනිශ්චයකරුවෙකු ලෙසට පත්කරන්නේ කෙසේද? තවද මෙසේ තිබියදීත් ඔවුහු පිටු දකිති. නියතවශයෙන්ම ඔවුහු කිසිවිටෙකත් විශ්වාසිතයින් නොවන්නාහ.

إِنَّا أَنْزَلْنَا التَّوْرَاةَ فِيهَا هُدًى وَنُورٌ ۚ يَحْكُمُ بِهَا النَّبِيُّونَ الَّذِينَ أَسْلَمُوا لِلَّذِينَ هَادُوا وَالرَّبَّانِيُّونَ وَالْأَحْبَارُ بِمَا اسْتُحْفِظُوا مِنْ كِتَابِ اللَّهِ وَكَانُوا عَلَيْهِ شُهَدَاءَ ۚ فَلَا تَخْشَوُا النَّاسَ وَاخْشَوْنِ وَلَا تَشْتَرُوا بِآيَاتِي ثَمَنًا قَلِيلًا ۚ وَمَنْ لَمْ يَحْكُمْ بِمَا أَنْزَلَ اللَّهُ فَأُولَٰئِكَ هُمُ الْكَافِرُونَ ﴿٤٥﴾

45. ඇත්තෙන්ම යහමගද ආලෝකයද තිබුණාවූ තව්රාත් අපි පහළ කළෙමු. එමගින් (අපට) අවනත වූ වක්තෘවරුන් යුදෙව්වන් සඳහා විනිශ්චය කළහ. මෙලෙසම දේව ශාස්තෘවරුන්ද (ආගමික නිතියෙහි) විද්වතුන්ද කළහ. (මක්නිසාදයත්) ඔවුන් අල්ලාහ්ගේ පුස්තකය සුරකිමට අවශ්‍ය කරනු ලැබුවන් අතර ඔවුන් එය මත ආරක්ෂකයින්ද වූ හෙයිනි. එබැවින් මිනිසුන්ට බිය නොවනු. එහෙත් මාහට බිය වනු. තවද මාගේ සළකුණු අල්ප මිළකට හුවමාරු නොකරනු. තවද යමෙක් අල්ලාහ් පහළ කර ඇති දේ මගින් විනිශ්චය නොකරන්නේද අවිශ්වාසිතයින් ඔවුහුම වෙති.

وَكَتَبْنَا عَلَيْهِمْ فِيهَا أَنَّ النَّفْسَ بِالنَّفْسِ وَالْعَيْنَ بِالْعَيْنِ وَالْأَنْفَ بِالْأَنْفِ وَالْأُذُنَ بِالْأُذُنِ وَالسِّنَّ بِالسِّنِّ وَالْجُرُوحَ قِصَاصٌ ۚ فَمَنْ تَصَدَّقَ بِهِ فَهُوَ كَفَّارَةٌ لَهُ ۚ وَمَنْ لَمْ يَحْكُمْ بِمَا أَنْزَلَ اللَّهُ فَأُولَٰئِكَ هُمُ الظَّالِمُونَ ﴿٤٦﴾

46. එහි ඔවුන්ට ප්‍රාණයට ප්‍රාණයද, ඇසට ඇසද, නාසයට නාසයද, කනට කනද, දතට දතද, යනුවෙන් අනෙක් හානියන්ට සමාන පළිගැනීමක් අපි නියම කළෙමු. තවද කවුරුන් හෝ එහි අයිතිය අත් හරින්නේද ඔහුගේ පව් වලින් විමෝචනයක් වනු ඇත. තවද යමෙක් අල්ලාහ් පහළ කර ඇති දේ මගින් විනිශ්චය නොකරන්නේද වරදකරුවන් ඔවුහුම වෙති.

وَقَفَّيْنَا عَلٰۤى اٰثَارِهِمْ بِعِيْسَى ابْنِ مَرْيَمَ مُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيْهِ مِنَ التَّوْرٰىةِ ۖ وَاٰتَيْنٰهُ الْاِنْجِيْلَ فِيْهِ هُدًى وَّنُوْرٌ ۙ وَّمُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيْهِ مِنَ التَّوْرٰىةِ وَهُدًى وَّمَوْعِظَةً لِّلْمُتَّقِيْنَ ﴿٤٧﴾

47. තම ඉදිරියෙහි (අනාවරණය වූ) තව්රාත් හි ඇති දේ සත්‍ය කරවන මර්යම්ගේ පුත් ඊසාව, අපි ඔවුන්ගේ අඩිපාර හි අනුගමනය කිරීමට සැළැස්වූවෙමු. තවද මගපෙන්වීම හා ආලෝකය අඩංගු ඉන්ජීල් නම් (ශුභාරංචිය) අපි ඔහුට දුනිමු. තවද එය එයට ඉදිරියෙන් තිබෙන තව්රාත් හි ඇති දේ සත්‍ය කරන්නා වූ මෙන්ම දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන්හට මග පෙන්වීමක්ද අනුශාසනාවක්ද විය.

وَلْيَحْكُمْ اَهْلُ الْاِنْجِيْلِ بِمَاۤ اَنْزَلَ اللّٰهُ فِيْهِ ؕ وَمَنْ لَّمْ يَحْكُمْ بِمَاۤ اَنْزَلَ اللّٰهُ فَاُولٰٓئِكَ هُمُ الْفٰسِقُوْنَ ﴿٤٨﴾

48. (ඉන්ජීල්) ශුභාරංචිලාභීන් අල්ලාහ් එහි අනාවරණය කළ දේට අනුව විනිශ්චය කළ යුතුය. තවද කවරෙක් අල්ලාහ් අනාවරණය කර ඇති දේට අනුව විනිශ්චය නොකරන්නේද ඔවුන්ම කැරලිකරුවන් වෙති.

وَاَنْزَلْنَاۤ اِلَيْكَ الْكِتٰبَ بِالْحَقِّ مُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيْهِ مِنَ الْكِتٰبِ وَمُهَيْمِنًا عَلَيْهِ فَاحْكُمْ بَيْنَهُمْ بِمَاۤ اَنْزَلَ اللّٰهُ وَلَا تَتَّبِعْ اَهْوَآءَهُمْ عَمَّا جَآءَكَ مِنَ الْحَقِّ ؕ لِكُلٍّ جَعَلْنَا مِنْكُمْ شِرْعَةً وَّمِنْهَاجًا ؕ وَلَوْ شَآءَ اللّٰهُ لَجَعَلَكُمْ اُمَّةً وَّاحِدَةً وَّلٰكِنْ لِّيَبْلُوَكُمْ فِيْ مَاۤ اٰتٰىكُمْ فَاسْتَبِقُوا الْخَيْرٰتِ ؕ اِلَى اللّٰهِ مَرْجِعُكُمْ جَمِيْعًا فَيُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ فِيْهِ تَخْتَلِفُوْنَ ۙ ﴿٤٩﴾

49. තවද අපි ඔබ වෙත සත්‍යය ඇතුලත් මෙම පුස්තකය අනාවරණය කර ඇත්තෙමු. (තවද) මෙය, මෙයට කළින්වූ පුස්තකය සම්පූර්ණ කරන්නක්ද එය ආරක්ෂා කරන්නක් ලෙසද විය. එබැවින් අල්ලාහ් (ඔබ වෙත) අනාවරණය කර ඇති දේ අනුව ඔවුන් අතර විනිශ්චය කරන්න. තවද ඔබ වෙත පැමිණි සත්‍යය හැරදමමින් ඔවුන්ගේ පාපකාරී අභිලාෂයන් අනුගමනය නොකරන්න. නුඹලාගෙන් සෑම කෙනෙකුටම අධ්‍යාත්මික නීතිමාලාවක්ද, (ලෞකික) විෂයයන්හි පැහැදිලි මාර්ගයක්ද අපි නියම කළෙමු. එමෙන්ම අල්ලාහ් තම කැමැත්ත (ක්‍රියාත්මක කළේ) නම් නුඹලා (සියල්ලන්වම) එකම ජන සමූහයක් බවට පත් කරනු ඇත. එහෙත් ඔහු නුඹලාට දුන් දෙයින් නුඹලා පරීක්ෂා කිරීම සඳහා (ඔහු කැමැති වන්නේය). එබැවින් යහපත් ක්‍රියාවන්හි එකිනෙකා අභිබවා යෑමට තරඟ කරනු. අල්ලාහ් වෙතම නුඹලා සියල්ලන්ම ආපසු යායුතු වන්නේය. එවිට නුඹලා මතභේද ඇතිකළ දේ පිළිබඳව ඔහු නුඹලාට දන්වන්නේය.

وَاَنِ احۡكُمۡ بَيۡنَهُمۡ بِمَاۤ اَنۡزَلَ اللّٰهُ وَلَا تَتَّبِعۡ اَهۡوَآءَهُمۡ وَاحۡذَرۡهُمۡ اَنۡ يَّفۡتِنُوۡكَ عَنۡۢ بَعۡضِ مَاۤ اَنۡزَلَ اللّٰهُ اِلَيۡكَ ؕ فَاِنۡ تَوَلَّوۡا فَاعۡلَمۡ اَنَّمَا يُرِيۡدُ اللّٰهُ اَنۡ يُّصِيۡبَهُمۡ بِبَعۡضِ ذُنُوۡبِهِمۡ ؕ وَاِنَّ كَثِيۡرًا مِّنَ النَّاسِ لَفٰسِقُوۡنَ ﴿۵۰﴾

50. තවද අල්ලාහ් අනාවරණය කර ඇති දේ අනුව ඔවුන් අතර ඔබ විනිශ්චය කිරීමටත් ඔවුන්ගේ පාපකාරී අභිලාෂයන් අනුගමනය නොකිරීමටත් අල්ලාහ් ඔබ වෙත අනාවරණය කළ දෙයහි කොටසක් හේතුකොට ගෙන ඔවුන් ඔබව පිඩාවට පත් නොකර සිටීමට ඔබ ඔවුන්ගෙන් ආරක්ෂා වීමටත් (අපි ඔබ වෙත ඔබට අණකරමින් මෙම ග්‍රන්ථය අනාවරණය කර ඇත්තෙමු). එහෙත් ඔවුන් ප්‍රතික්ෂේප කළේ නම් එවිට ඔවුන්ගේ ඇතැම් පාපයන් වෙනුවෙන් අල්ලාහ් ඔවුන්ව දැඩි දුෂ්කරතාවයට පත් කිරීමට අභිමත කරන බව දැනගන්න. තවද නියතවශයෙන්ම මිනිසුන්ගෙන් විශාල පිරිසක් අකීකරුවන්නෝ වෙති.

اَفَحُكۡمَ الۡجَاهِلِيَّةِ يَبۡغُوۡنَ ؕ وَمَنۡ اَحۡسَنُ مِنَ اللّٰهِ حُكۡمًا لِّقَوۡمٍ يُّوۡقِنُوۡنَ ﴿۵۱﴾ ع

51. එසේනම් අඥාන (කාලයේ) විනිශ්චයට ඔවුන් කැමැතිවන්නේද? තවද දැඩි විශ්වාසිත පිරිසක් වෙනුවෙන් විනිශ්චයකරුවෙක් ලෙස අල්ලාහ්ට වඩා විශිෂ්ට වන්නේ අන් කවරෙක්ද?

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا لَا تَتَّخِذُوا الۡيَهُوۡدَ وَالنَّصٰرٰۤى اَوۡلِيَآءَ ۘ بَعۡضُهُمۡ اَوۡلِيَآءُ بَعۡضٍ ؕ وَمَنۡ يَّتَوَلَّهُمۡ مِّنۡكُمۡ فَاِنَّهٗ مِنۡهُمۡ ؕ اِنَّ اللّٰهَ لَا يَهۡدِى الۡقَوۡمَ الظّٰلِمِيۡنَ ﴿۵۲﴾

52. එම්බල විශ්වාසිතයිනි! යුදෙව්වරුන්වත් කිතුනුවරුන්වත් සහායකයින් ලෙස නොගනු. ඔවුහු එකිනෙකාට සහායකයෝ වෙති. තවද නුඹලා අතුරෙන් කවරෙක් ඔවුන්ව සහායකයින් ලෙස ගන්නේද ඇත්තෙන්ම ඔහු ඔවුන්ගෙන් කෙනෙක් වන්නේය. ඇත්තෙන්ම අල්ලාහ් අසාධාරණය කරන පිරිසට මග පෙන්වීම නොකරයි.

فَتَرَى الَّذِيۡنَ فِىۡ قُلُوۡبِهِمۡ مَّرَضٌ يُّسَارِعُوۡنَ فِيۡهِمۡ يَقُوۡلُوۡنَ نَخۡشٰٓى اَنۡ تُصِيۡبَنَا دَآئِرَةٌ ؕ فَعَسَى اللّٰهُ اَنۡ يَّاۡتِىَ بِالۡفَتۡحِ اَوۡ اَمۡرٍ مِّنۡ عِنۡدِهٖ فَيُصۡبِحُوۡا عَلٰى مَاۤ اَسَرُّوۡا فِىۡۤ اَنۡفُسِهِمۡ نٰدِمِيۡنَ ؕ ﴿۵۳﴾

53. යම් අයවලුන්ගේ හදවත් හි රෝගය තිබේද, ඔවුහු ඔවුන් දෙසට වේගයෙන් යන බව ඔබ දකින්නෙහිය. 'අප වෙත කිසියම් විපත්තියක් පමුණුවේදැ'යි බිය වන බැව් ඔවුහු පවසති. අල්ලාහ්ට, තමා වෙතින් ජයග්‍රහණයක්ද, නැතහොත් කිසියම් සිද්ධියක්ද ඇති කිරීමට පුළුවන. එවිට ඔවුහු තමන්ගේ සිත්හි සඟවා තැබූ දේ ගැන පසුතැවිල්ලට පත්වන්නන් වෙති.

54. 'තවද නියතවශයෙන්ම තමන් නුඹලා සමඟ යැයි, අල්ලාහ් කෙරෙහි ස්ථිර ලෙස දිවුරුම් කළ අයවලුන් මොවුන්ම දැ'යි විශ්වාසිතයින් පවසන්නෝය. මොවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල වන අතර මොවුන් පාඩුවිඳින්නන් බවට පත්වූහ.

وَيَقُولُ الَّذِينَ آمَنُوا أَهَٰؤُلَاءِ الَّذِينَ أَقْسَمُوا بِاللَّهِ جَهْدَ أَيْمَانِهِمْ ۙ إِنَّهُمْ لَمَعَكُمْ ۚ حَبِطَتْ أَعْمَالُهُمْ فَأَصْبَحُوا خَاسِرِينَ ﴿٥٤﴾

55. එම්බල විශ්වාසිතයිනි! යමෙක් නුඹලා අතුරෙන් තම ධර්මයෙන් බැහැරව යන්නේද අල්ලාහ් වහාම (ඔවුන් හැර) වෙනත් ජන සමාජයක් රැගෙන එන්නේයැයි (දැනගනිත්වා). ඔහු ඔවුනට ස්නේහය දක්වන අතර ඔවුන්ද ඔහුට ස්නේහය කරන්නෝය. (තවද ඔවුන්) විශ්වාසිතයින් කෙරෙහි කාරුණික හා නිහතමානි වන අතර අවිශ්වාසිතයින්ට එරෙහිව දැඩි හා තිරසාර වන්නෝය. ඔවුහු අල්ලාහ්ගේ මාර්ගයෙහි මහත් ප්‍රයත්න දරන අතර දෝෂාරෝපණය කරන්නන්ගේ අවලාද වලට බිය නොවන්නෝය. එය අල්ලාහ්ගේ දයාව වන්නේය. ඔහු කැමැති අයට ඔහු එය පිරිනමයි. එමෙන්ම අල්ලාහ් සර්ව ව්‍යාපකයාය, සියල්ල දන්නාය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا مَنْ يَرْتَدَّ مِنْكُمْ عَنْ دِينِهِ فَسَوْفَ يَأْتِي اللَّهُ بِقَوْمٍ يُحِبُّهُمْ وَيُحِبُّونَهُ أَذِلَّةٍ عَلَى الْمُؤْمِنِينَ أَعِزَّةٍ عَلَى الْكَافِرِينَ يُجَاهِدُونَ فِي سَبِيلِ اللَّهِ وَلَا يَخَافُونَ لَوْمَةَ لَائِمٍ ۚ ذَٰلِكَ فَضْلُ اللَّهِ يُؤْتِيهِ مَنْ يَشَاءُ ۚ وَاللَّهُ وَاسِعٌ عَلِيمٌ ﴿٥٥﴾

56. නුඹලාගේ මිත්‍රයා වනුයේ අල්ලාහ්ද ඔහුගේ දූතයාණන්ද එමෙන්ම නැමදුම් ඉටුකරමින් zසකාත් (දුගී බද්ද) ගෙවමින් හා (මුළුමනින් අවංක) ලෙස ඔහුටම යටහත් වන විශ්වාසිතයෝය.

إِنَّمَا وَلِيُّكُمُ اللَّهُ وَرَسُولُهُ وَالَّذِينَ آمَنُوا الَّذِينَ يُقِيمُونَ الصَّلَاةَ وَيُؤْتُونَ الزَّكَاةَ وَهُمْ رَاكِعُونَ ﴿٥٦﴾

57. අල්ලාහ්වද ඔහුගේ දූතයාණන්වද විශ්වාසිත අයවලුන්වද මිතුරන් ලෙස ගන්නන්ම ජයග්‍රාහිකයින් වන අල්ලාහ්ගේ පාක්ෂිකයින්ය.

وَمَنْ يَتَوَلَّ اللَّهَ وَرَسُولَهُ وَالَّذِينَ آمَنُوا فَإِنَّ حِزْبَ اللَّهِ هُمُ الْغَالِبُونَ ﴿٥٧﴾

58. එම්බල විශ්වාසිතයිනි! නුඹලාට කලින් පුස්තකලාභීන් අතුරෙන් නුඹලාගේ ධර්මය කවටකමක් ලෙසටද කෙළි සෙල්ලමක් ලෙසටද පත් කළ අයවලුන්වද

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَتَّخِذُوا الَّذِينَ اتَّخَذُوا دِينَكُمْ هُزُوًا وَلَعِبًا مِنَ الَّذِينَ

අවිශ්වාසිතයින්වද (නුඹලාගේ) මිතුරන් වශයෙන් නොගනු. එමෙන්ම නුඹලා විශ්වාසිතයින් වන්නේ නම්, අල්ලාහ් කෙරෙහි බියවනු.

أُوتُوا الْكِتَابَ مِن قَبْلِكُمْ وَالْكُفَّارَ أَوْلِيَاءَ ۚ وَاتَّقُوا اللَّهَ إِن كُنتُم مُّؤْمِنِينَ ﴿٥٨﴾

59. එමෙන්ම නුඹලා (මිනිසුන්ව) නමස්කාරයට කැඳවන කල්හි, ඔවුහු එය කවටකමක් ලෙසද, කෙළි සෙල්ලමක් ලෙසද සළකති. මෙයට හේතුව ඔවුන් අවබෝධයක් නැති ජනතාවක් බැවිනි.

وَإِذَا نَادَيْتُمْ إِلَى الصَّلَاةِ اتَّخَذُوهَا هُزُوًا وَلَعِبًا ؕ ذَٰلِكَ بِأَنَّهُمْ قَوْمٌ لَّا يَعْقِلُونَ ﴿٥٩﴾

60. පවසන්න! 'එම්බල පුස්තකලාභිනි! නුඹලා අප වෙත දොස් පවසන්නේ, අප අල්ලාහ් කෙරෙහිත්, අප වෙත පහළ කරනු ලැබූ දේ කෙරෙහිත්, (මීට) කලින් පහළ කරනු ලැබූ දේ කෙරෙහිත් විශ්වාස කළ හෙයින්ද? එමෙන්ම නුඹලාගෙන් බොහෝ අය (දෙවියන්ට) අවනත නොවී සිටින්නන් වූ හෙයින්ද?'

قُلْ يَا أَهْلَ الْكِتَابِ هَلْ تَنقِمُونَ مِنَّا إِلَّا أَنْ آمَنَّا بِاللَّهِ وَمَا أُنزِلَ إِلَيْنَا وَمَا أُنزِلَ مِن قَبْلُ ۙ وَأَنَّ أَكْثَرَكُمْ فَاسِقُونَ ﴿٦٠﴾

61. පවසන්න! 'අල්ලාහ් අභියස ඉතා නරක ප්‍රතිවිපාකය ලත් අය පිළිබඳව මා නුඹලාට දන්වන්නද? අල්ලාහ් ශාප කර ඇති අය (ඔවුන්ය). තවද ඔවුන් වෙත ඔහුගේ කෝපය පතිත වී ඇත. තවද ඔවුන්ගෙන් වඳුරන්ද සූකරයන්ද ඔහු පත් කර ඇත. තවද ඔවුන් දුෂ්ඨයෙකුට වඳින්නෝය. සැබවින්ම මෙවන් අය සිටින්නේ ඉතා නරක ස්ථානයෙහිය. තවද ඍජු මාර්ගයේ සිට බොහෝ දුර නොමග ගොස්ය'.

قُلْ هَلْ أُنَبِّئُكُم بِشَرٍّ مِّن ذَٰلِكَ مَثُوبَةً عِندَ اللَّهِ ؕ مَن لَّعَنَهُ اللَّهُ وَغَضِبَ عَلَيْهِ وَجَعَلَ مِنْهُمُ الْقِرَدَةَ وَالْخَنَازِيرَ وَعَبَدَ الطَّاغُوتَ ؕ أُولَٰئِكَ شَرٌّ مَّكَانًا وَأَضَلُّ عَن سَوَاءِ السَّبِيلِ ﴿٦١﴾

62. එමෙන්ම ඔවුහු නුඹලා වෙත පැමිණෙන විට, 'අපි විශ්වාස කළෙමු'යි පවසති. එහෙත් ඔවුහු අවිශ්වාසය සමඟ පිවිස එය සමඟම බැහැරව ගියහ. එමෙන්ම ඔවුන් සඟවා තබන දේ පිළිබඳව අල්ලාහ් මැනැවින් දන්නේය.

وَإِذَا جَاءُوكُمْ قَالُوا آمَنَّا وَقَد دَّخَلُوا بِالْكُفْرِ وَهُمْ قَدْ خَرَجُوا بِهِ ؕ وَاللَّهُ أَعْلَمُ بِمَا كَانُوا يَكْتُمُونَ ﴿٦٢﴾

63. එමෙන්ම ඔවුනතුරින් බොහෝ අය පාපය, සීමාව ඉක්මවා යෑම හා තහනම් දේ ඕනෑකමින් අනුභව කිරීම

وَتَرَىٰ كَثِيرًا مِّنْهُمْ يُسَارِعُونَ فِي الْإِثْمِ وَالْعُدْوَانِ وَأَكْلِهِمُ السُّحْتَ ؕ لَبِئْسَ مَا

كَانُوْا يَعْمَلُوْنَ ﴿٦٣﴾

වෙත දිව යන බැව් ඔබ දකින්නෙහිය. සත්තකින්ම ඔවුන් කරමින් සිටි දේ ඉතාමත් නරකය.

لَوْلَا يَنْهٰىهُمُ الرَّبّٰنِيُّوْنَ وَالْاَحْبَارُ عَنْ قَوْلِهِمُ الْاِثْمَ وَاَكْلِهِمُ السُّحْتَ ؕ لَبِئْسَ مَا كَانُوْا يَصْنَعُوْنَ ﴿٦٤﴾

64. දේව පූජකවරු මෙන්ම නීතිය හැදෑරූ අය, ඔවුන්ව බොරු කීමෙන්ද තහනම් දේ අනුභව කිරීමෙන්ද නොවළක්වන්නේ මන්ද? සත්තකින්ම ඔවුන් කරන දේ ඉතාමත් නරකය.

وَقَالَتِ الْيَهُوْدُ يَدُ اللّٰهِ مَغْلُوْلَةٌ ؕ غُلَّتْ اَيْدِيْهِمْ وَلُعِنُوْا بِمَا قَالُوْا ۘ بَلْ يَدٰهُ مَبْسُوْطَتٰنِ ۙ يُنْفِقُ كَيْفَ يَشَآءُ ؕ وَلَيَزِيْدَنَّ كَثِيْرًا مِّنْهُمْ مَّاۤ اُنْزِلَ اِلَيْكَ مِنْ رَّبِّكَ طُغْيَانًا وَّكُفْرًا ؕ وَاَلْقَيْنَا بَيْنَهُمُ الْعَدَاوَةَ وَالْبَغْضَآءَ اِلٰى يَوْمِ الْقِيٰمَةِ ؕ كُلَّمَاۤ اَوْقَدُوْا نَارًا لِّلْحَرْبِ اَطْفَاَهَا اللّٰهُ ۙ وَيَسْعَوْنَ فِى الْاَرْضِ فَسَادًا ؕ وَاللّٰهُ لَا يُحِبُّ الْمُفْسِدِيْنَ ﴿٦٥﴾

65. එමෙන්ම, 'අල්ලාහ්ගේ හස්තය බඳිනු ලැබ ඇතැ'යි යුදෙව්වරු කියති. ඔවුන් (එසේ) කියූ හෙයින්, බඳිනු ලැබ ඇත්තේ ඔවුන්ගේ(ම) අත්ය. එමෙන්ම ශාප කරනු ලැබුවේද ඔවුන්මය. එසේ නොව, ඔහුගේ දෑත් ව්‍යාපිතය. ඔහු තම අභිමතය පරිදි වැය කරන්නේය. තවද ඔබ වෙත ඔබගේ අධිපතියාණන්ගෙන් පහළ කරන ලද දේ නියතවශයෙන්ම ඔවුන්ගෙන් බොහෝ දෙනෙක්ව කැරලිකමෙහි හා අවිශ්වාසිතයෙහි වැඩි කරන්නේය. තවද පුනරුත්ථාන දිනය තෙක් අපි ඔවුන් අතර සතුරුකම හා පිළිකුල ඇති කළෙමු. ඔවුන් යුද ගිනිසිළු අවුලුවන සෑමවිටම අල්ලාහ් එය නිවා දමන්නේය. තවද ඔවුහු පොළොවෙහි කෝලාහල ඇතිකිරීමට වෙහෙස දරති. තවද අල්ලාහ් කෝලාහල ඇති කරන්නන්ව ප්‍රිය නොකරන්නේය.

وَلَوْ اَنَّ اَهْلَ الْكِتٰبِ اٰمَنُوْا وَاتَّقَوْا لَكَفَّرْنَا عَنْهُمْ سَيِّاٰتِهِمْ وَلَاَدْخَلْنٰهُمْ جَنّٰتِ النَّعِيْمِ ﴿٦٦﴾

66. එමෙන්ම පුස්තකය ලද ජනතාව විශ්වාස කොට ධාර්මිෂ්ඨ වූවාහොත්, සත්තකින්ම අපි ඔවුන්ගේ දුෂ්ඨකම් ඔවුන්ගෙන් ඉවත් කරවන්නෙමු. එමෙන්ම සත්තකින්ම අපි දිව්‍ය සැපතින් යුක්ත වූ උද්‍යානයන්හි ඔවුන්ව ඇතුළු කරවන්නෙමු.

وَلَوْ اَنَّهُمْ اَقَامُوا التَّوْرٰىةَ وَالْاِنْجِيْلَ وَمَاۤ

67. තවද ඔවුන් තව්රාත්ද, ඉන්ජීල්ද එමෙන්ම ඔවුන්ගේ අධිපතියාණන් වෙතින් (දැනට) ඔවුන් වෙත පහළ

أُنزِلَ إِلَيْهِم مِّن رَّبِّهِمْ لَأَكَلُوا مِن فَوْقِهِمْ وَمِن تَحْتِ أَرْجُلِهِم ۚ مِّنْهُمْ أُمَّةٌ مُّقْتَصِدَةٌ ۖ وَكَثِيرٌ مِّنْهُمْ سَاءَ مَا يَعْمَلُونَ ﴿٦٧﴾

කරන ලද දේ පිළිපැද්දේ නම්, සත්තකින්ම තමන්ට ඉහළින්ද, තමන්ගේ පාදයන්ට පහළින්ද ඔවුන් (යහපත් දේ) භුක්ති විඳිනු ඇත. ඔවුනතුරින් මධ්‍යස්ථ වූ ජන සමූහයක්ද ඇත. එහෙත් ඔවුන්ගෙන් බොහෝ අය කරමින් සිටින දේ ඉතා නපුරය.

يَا أَيُّهَا الرَّسُولُ بَلِّغْ مَا أُنزِلَ إِلَيْكَ مِن رَّبِّكَ ۖ وَإِن لَّمْ تَفْعَلْ فَمَا بَلَّغْتَ رِسَالَتَهُ ۚ وَاللَّهُ يَعْصِمُكَ مِنَ النَّاسِ ۗ إِنَّ اللَّهَ لَا يَهْدِي الْقَوْمَ الْكَافِرِينَ ﴿٦٨﴾

68. එම්බල දූතයාණෙනි! ඔබගේ අධිපතියාණන් වෙතින් ඔබ වෙත අනාවරණය කරන ලද දේ (මිනිසුන්ට) දන්වන්න. තවද ඔබ (එසේ) නොකළේ නම්, ඔබ ඔහුගේ පණිවිඩය (කිසිසේත්) දන්වා නොමැත. තවද අල්ලාහ් ඔබව මිනිසුන්ගෙන් ආරක්ෂා කරන්නේය. ඇත්තෙන්ම අල්ලාහ් අවිශ්වාසිත ජනතාවට මග නොපෙන්වන්නේය.

قُلْ يَا أَهْلَ الْكِتَابِ لَسْتُمْ عَلَىٰ شَيْءٍ حَتَّىٰ تُقِيمُوا التَّوْرَاةَ وَالْإِنجِيلَ وَمَا أُنزِلَ إِلَيْكُم مِّن رَّبِّكُمْ ۗ وَلَيَزِيدَنَّ كَثِيرًا مِّنْهُم مَّا أُنزِلَ إِلَيْكَ مِن رَّبِّكَ طُغْيَانًا وَكُفْرًا ۖ فَلَا تَأْسَ عَلَى الْقَوْمِ الْكَافِرِينَ ﴿٦٩﴾

69. 'එම්බල පුස්තකය ලද ජනතාවනි! තව්රාත්ද, ඉන්ජීල්ද නුඹලාගේ අධිපතියාණන් වෙතින් නුඹලා වෙත පහළ කරනු ලබන දේද පිළිපදින තෙක් නුඹලා කිසිඳු (ස්ථාවරයක්) මත නොවන්නාහු'යි පවසන්න. තවද ඔබගේ අධිපතියාණන්ගෙන් ඔබ වෙත පහළ කරන ලද දේ නියතවශයෙන්ම ඔවුන්ගෙන් බොහෝ දෙනෙක්ව කැරලිකමෙහි හා අවිශ්වාසිතයෙහි වැඩි කරන්නේය. එබැවින් ඔබ අවිශ්වාසිත ජනයා වෙනුවෙන් කණගාටු නොවන්න.

إِنَّ الَّذِينَ آمَنُوا وَالَّذِينَ هَادُوا وَالصَّابِئُونَ وَالنَّصَارَىٰ مَنْ آمَنَ بِاللَّهِ وَالْيَوْمِ الْآخِرِ وَعَمِلَ صَالِحًا فَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُونَ ﴿٧٠﴾

70. විශ්වාස කළ අයවලුන්, යුදෙව්වරුන්, සාබිවරුන්, කිතුනුවන් කවුරුන් වුවද අල්ලාහ් කෙරෙහිද අවසන් දිනය කෙරෙහිද ඇත්තෙන්ම විශ්වාස කර, යහපත් ක්‍රියාවෙහි යෙදෙන ඔවුනට කිසිඳු බියක් (පැමිණෙන්නේ) නැත. එමෙන්ම ඔවුහු ශෝක නොවන්නෝය.

لَقَدْ أَخَذْنَا مِيثَاقَ بَنِىٓ إِسْرَٰٓءِيلَ وَأَرْسَلْنَآ إِلَيْهِمْ رُسُلًا ۖ كُلَّمَا جَآءَهُمْ رَسُولٌۢ بِمَا لَا تَهْوَىٰٓ أَنفُسُهُمْ فَرِيقًا كَذَّبُوا۟ وَفَرِيقًا يَقْتُلُونَ ﴿٧١﴾

71. සැබැවින්ම අපි ඉස්රාඊලයේ දරුවන්ගෙන් ප්‍රතිඥාවක් ලබාගත්තෙමු. එමෙන්ම අපි ඔවුන් වෙත දූතයන් එව්වෙමු. ඔවුන්ගේ සිත් ප්‍රිය නොකරන්නාවූ දෙයක් දූතයෙකු ඔවුන් වෙත ගෙන එන සෑමවිටම ඔවුන් (දූතයන්ගෙන්) සමහරුන්ව මුසාවාදීන් ලෙස සැළකූහ. එමෙන්ම ඇතැමුන්ව ඝාතනය කිරීමට ඔවුහු පෙළඹූහ.

وَحَسِبُوٓا۟ أَلَّا تَكُونَ فِتْنَةٌ فَعَمُوا۟ وَصَمُّوا۟ ثُمَّ تَابَ ٱللَّهُ عَلَيْهِمْ ثُمَّ عَمُوا۟ وَصَمُّوا۟ كَثِيرٌ مِّنْهُمْ ۚ وَٱللَّهُ بَصِيرٌۢ بِمَا يَعْمَلُونَ ﴿٧٢﴾

72. එමෙන්ම ඔවුහු (මෙමගින්) කිසිඳු අනර්ථයක් නොවනු ඇතැයි සිතූහ. එබැවින් ඔවුහු අන්ධ මෙන්ම බිහිරි වූහ. ඉන්පසු අල්ලාහ් පශ්චාත්තාපය පිළිගෙන ඔවුන් වෙත අවධානය යොමු කළේය. මින්පසුවත් ඔවුන්ගෙන් බොහෝමයක් (දැන දැනම) අන්ධ මෙන්ම බිහිරි වූහ. එමෙන්ම අල්ලාහ් ඔවුන් කරමින් සිටින දේ ගැන විමසිලිමත්ය.

لَقَدْ كَفَرَ ٱلَّذِينَ قَالُوٓا۟ إِنَّ ٱللَّهَ هُوَ ٱلْمَسِيحُ ٱبْنُ مَرْيَمَ ۖ وَقَالَ ٱلْمَسِيحُ يَٰبَنِىٓ إِسْرَٰٓءِيلَ ٱعْبُدُوا۟ ٱللَّهَ رَبِّى وَرَبَّكُمْ ۖ إِنَّهُۥ مَن يُشْرِكْ بِٱللَّهِ فَقَدْ حَرَّمَ ٱللَّهُ عَلَيْهِ ٱلْجَنَّةَ وَمَأْوَىٰهُ ٱلنَّارُ ۖ وَمَا لِلظَّٰلِمِينَ مِنْ أَنصَارٍ ﴿٧٣﴾

73. 'ඇත්තෙන්ම මර්යම්ගේ පුත් මෙසායා අල්ලාහ්මයැ'යි පවසන අයවලුන් සත්තකින්ම අවිශ්වාසිතයින්ය. එහෙත් 'එම්බල ඉස්රාඊලයේ දරුවනි! මාගේ අධිපතියාණන්ද, නුඹලාගේ අධිපතියාණන්ද වන අල්ලාහ්ට නුඹලා නමදින්නැ'යි මෙසායා(ම) පැවසීය. ඇත්තෙන්ම කවරෙකු අල්ලාහ්ට සමානයන් තබන්නේද, ඔහුට අල්ලාහ් ස්වර්ගය තහනම් කර ඇත්තේය. ඔහුගේ වාසස්ථානය නිරාගින්නය. එමෙන්ම වැරදි කරන්නන්ට උදව්කරුවන් කිසිවෙක් නොවන්නෝය.

لَّقَدْ كَفَرَ ٱلَّذِينَ قَالُوٓا۟ إِنَّ ٱللَّهَ ثَالِثُ ثَلَٰثَةٍ ۘ وَمَا مِنْ إِلَٰهٍ إِلَّآ إِلَٰهٌ وَٰحِدٌ ۚ وَإِن لَّمْ يَنتَهُوا۟ عَمَّا يَقُولُونَ لَيَمَسَّنَّ

74. සැබැවින්ම අල්ලාහ් තිදෙනාගෙන් එක්කෙනෙකු යැයි පවසන අයවලුන් අවිශ්වාසිතයින්ය. එමෙන්ම නැමදීමට එකම සුදුස්සෙකු හැරෙන්නට වෙනත් නැමදීමට සුදුස්සෙකු නොමැත. එමෙන්ම ඔවුහු පවසා සිටින දෙයින් ඔවුන් වැළකී නොසිටියානම්, ඔවුනතුරින්

අවිශ්වාසිත අයවලුන් හට වේදනාකාරී දඬුවමක් සත්තකින්ම අත්වන්නේය.

الَّذِيْنَ كَفَرُوْا مِنْهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿٧٤﴾

75. මින් පසුවත් ඔවුන් අල්ලාහ් වෙත හැරී, ඔහුගෙන් ක්ෂමාව නොඉල්ලන්නේද? අල්ලාහ්ද බෙහෙවින් ක්ෂමාන්විතය, පරම දයාබරය.

اَفَلَا يَتُوْبُوْنَ اِلَى اللّٰهِ وَيَسْتَغْفِرُوْنَهٗ ؕ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٧٥﴾

76. මර්යම්ගේ පුත්‍රයා මෙසායා එක් දූතයෙකු මිස අන් කිසිවෙකු නොවේ. සැබැවින්ම ඔහුට කලින් සිටි සියළුම දූතයෝ මියගියහ. එමෙන්ම ඔහුගේ මව ධාර්මිෂ්ඨ තැනැත්තියක් වූවාය. ඔවුන් දෙදෙනා ආහාර අනුභව කරමින් සිටියහ. ඔවුන්ගේ යහපත පිණිස සළකුණු අප පහදා දෙන්නේ කෙසේදැයි බලන්න. මින් පසු ඔවුන් හරවනු ලබන්නේ කෙසේද යන්නත් බලන්න.

مَا الْمَسِيْحُ ابْنُ مَرْيَمَ اِلَّا رَسُوْلٌ ۚ قَدْ خَلَتْ مِنْ قَبْلِهِ الرُّسُلُ ؕ وَاُمُّهٗ صِدِّيْقَةٌ ؕ كَانَا يَاْكُلٰنِ الطَّعَامَ ؕ اُنْظُرْ كَيْفَ نُبَيِّنُ لَهُمُ الْاٰيٰتِ ثُمَّ انْظُرْ اَنّٰى يُؤْفَكُوْنَ ﴿٧٦﴾

77. පවසන්න! 'අල්ලාහ් වෙනුවට නුඹලාට විපතක් හෝ යහපතක් පමුණුවීමට බලයක් නොමැති දෙයට නුඹලා නමදින්නෙහුද?' එමෙන්ම අල්ලාහ් වන ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

قُلْ اَتَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ مَا لَا يَمْلِكُ لَكُمْ ضَرًّا وَّلَا نَفْعًا ؕ وَاللّٰهُ هُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿٧٧﴾

78. පවසන්න, 'එම්බල පුස්තකය ලද ජනතාවනි! නුඹලා නුඹලාගේ ධර්මයේ (විෂයය)හි අයුතු ලෙස සීමාවන් ඉක්මවා නොයනු. එමෙන්ම මීට පෙර (තමන්ද) නොමග ගොස් බොහෝ අයව නොමග යවමින් සෘජු මාර්ගයෙන් දුර්මාර්ගයට ගිය අයවලුන්ගේ දුෂ්ඨ අභිලාෂයන් අනුගමනය නොකරනු.'

قُلْ يٰۤاَهْلَ الْكِتٰبِ لَا تَغْلُوْا فِىْ دِيْنِكُمْ غَيْرَ الْحَقِّ وَلَا تَتَّبِعُوْۤا اَهْوَآءَ قَوْمٍ قَدْ ضَلُّوْا مِنْ قَبْلُ وَاَضَلُّوْا كَثِيْرًا وَّضَلُّوْا عَنْ سَوَآءِ السَّبِيْلِ ﴿٧٨﴾ ع

79. ඉස්රාඊලයේ ජනතාව අතුරින් අවිශ්වාස කළ අය, දාවුද් මෙන්ම මර්යම්ගේ පුත් ඊසාගේ මුවින් ශාප කරනු ලැබූවාහ. මෙයට හේතුව ඔවුන් අකීකරු වූ හෙයින්ද, සීමාව ඉක්මවා සිටිය හෙයින්ද වේ.

لُعِنَ الَّذِيْنَ كَفَرُوْا مِنْۢ بَنِىْۤ اِسْرَآءِيْلَ عَلٰى لِسَانِ دَاوٗدَ وَعِيْسَى ابْنِ مَرْيَمَ ؕ ذٰلِكَ بِمَا عَصَوْا وَّكَانُوْا يَعْتَدُوْنَ ﴿٧٩﴾

كَانُوا لَا يَتَنَاهَوْنَ عَن مُّنكَرٍ فَعَلُوهُ ۚ لَبِئْسَ مَا كَانُوا يَفْعَلُونَ ۝٨٠

80. තමන් කළාවූ වැරදි ක්‍රියාවලින් ඔවුන් එකිනෙකා නොවළක්වා ගත්තේද නැත. ඔවුන් කරමින් සිටි දේ ඉතා නපුරුය.

تَرَىٰ كَثِيرًا مِّنْهُمْ يَتَوَلَّوْنَ الَّذِينَ كَفَرُوا ۚ لَبِئْسَ مَا قَدَّمَتْ لَهُمْ أَنفُسُهُمْ أَن سَخِطَ اللَّهُ عَلَيْهِمْ وَفِي الْعَذَابِ هُمْ خَالِدُونَ ۝٨١

81. ඔවුනතුරෙන් බොහෝ අයවලුන් අවිශ්වාසිතයින්ව (තමන්ගේ) සහායකයින් කර ගැනීම ඔබ දකින්නෙහිය. ඔවුන් තමන් වෙනුවෙන් තමන්ට කලින් එවා ඇති දේ ඇත්තෙන්ම නපුරුය. (මෙහි ප්‍රතිඵලයක් වශයෙන්) අල්ලාහ් ඔවුන් කෙරෙහි අප්‍රසාද විය. එමෙන්ම ඔවුහු (මෙම) දඬුවමෙහි දිගුකල් වෙසෙති.

وَلَوْ كَانُوا يُؤْمِنُونَ بِاللَّهِ وَالنَّبِيِّ وَمَا أُنزِلَ إِلَيْهِ مَا اتَّخَذُوهُمْ أَوْلِيَاءَ وَلَٰكِنَّ كَثِيرًا مِّنْهُمْ فَاسِقُونَ ۝٨٢

82. එමෙන්ම ඔවුන් අල්ලාහ් කෙරෙහිද, මෙම දූතයා කෙරෙහිද ඔහු වෙත පහළ කළ දේ කෙරෙහිද විශ්වාස කළේ නම්, ඔවුන්ව (තමන්ගේ) සහායකයින් වශයෙන් නොගන්නට තිබුණි. එහෙත් ඔවුන්ගෙන් වැඩි පිරිසක් අවනත නොවන්නන් වෙති.

لَتَجِدَنَّ أَشَدَّ النَّاسِ عَدَاوَةً لِّلَّذِينَ آمَنُوا الْيَهُودَ وَالَّذِينَ أَشْرَكُوا ۖ وَلَتَجِدَنَّ أَقْرَبَهُم مَّوَدَّةً لِّلَّذِينَ آمَنُوا الَّذِينَ قَالُوا إِنَّا نَصَارَىٰ ۚ ذَٰلِكَ بِأَنَّ مِنْهُمْ قِسِّيسِينَ وَرُهْبَانًا وَأَنَّهُمْ لَا يَسْتَكْبِرُونَ ۝٨٣

83. විශ්වාසිත අයවලුන් සමග සතුරුකම් දැක්වීමේදී යුදෙව්වරුන්වද, (දෙවියන්ට) සමාන තබන අයවලුන්වද මිනිසුන්ගෙන් ඉතා දරුණු අය බැව් සත්තකින්ම ඔබ දකින්නෙහිය. එමෙන්ම විශ්වාසිත අයවලුන්හට ආදරය දැක්වීමේදී 'අපි කිතුනුවන් වෙමු'යි පවසන්නන්ව ඉතා සමීප අය බැව් සත්තකින්ම ඔබ දකින්නෙහිය. මක්නිසාදයත් ඔවුනතුරින් බැතිමත් විද්වතුන්ද යාච්ඤා කරන්නන්ද ඇත්තාහ. එමෙන්ම ඔවුන් උඩඟු නොවී සිටීමද මෙයට හේතුවන්නේය.

وَإِذَا سَمِعُوا مَا أُنزِلَ إِلَى الرَّسُولِ تَرَىٰ أَعْيُنَهُمْ تَفِيضُ مِنَ الدَّمْعِ مِمَّا عَرَفُوا مِنَ الْحَقِّ ۖ يَقُولُونَ رَبَّنَا آمَنَّا

84. එමෙන්ම මෙම දූතයාණන් වෙත පහළ කරනු ලැබූ දේ(ව වාක්‍යය)ට ඔවුන් සවන් දුන් විට ඔවුන් සත්‍යය අවබෝධ කරගත් හෙයින් ඔවුන්ගේ ඇස්වලින් කඳුළු වැක්කෙරෙමින් සිටින බව ඔබ දකින්නෙහිය. 'අපගේ

فَاكْتُبْنَا مَعَ الشّٰهِدِيْنَ ﴿٨٤﴾

අධිපතියාණෙනි! අපි විශ්වාස කරමු. එබැවින් අපව ද සාක්ෂි පවසන්නන් සමග ලියා තබනු මැනව'යි ඔවුන් පවසති.

وَمَا لَنَا لَا نُؤْمِنُ بِاللّٰهِ وَمَا جَآءَنَا مِنَ الْحَقِّ ۙ وَنَطْمَعُ اَنْ يُّدْخِلَنَا رَبُّنَا مَعَ الْقَوْمِ الصّٰلِحِيْنَ ﴿٨٥﴾

85. 'අපගේ අධිපතියාණෙනි! අපව ධාර්මිෂ්ඨ පිරිස සමඟ ඇතුළත් කළ යුතුයැයි අප දැඩි කැමැත්තෙන් සිටියදීත්, අල්ලාහ් කෙරෙහිත් අප වෙත පැමිණි සත්‍යය කෙරෙහිත් අප විශ්වාස නොකර සිටින්නේ මන්ද?'

فَاَثَابَهُمُ اللّٰهُ بِمَا قَالُوْا جَنّٰتٍ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَا ۗ وَذٰلِكَ جَزَآءُ الْمُحْسِنِيْنَ ﴿٨٦﴾

86. එසේ ඔවුන් පැවසූ හෙයින් පහළින් ගලාබසිනා ගංගාවලින් යුත් ස්වර්ගයන් අල්ලාහ් ඔවුනට පිරිනමන්නේය. ඔවුහු එහිම සදාකල් වෙසෙන්නෝය. මෙයම යහපත් ක්‍රියාවෙහි යෙදෙන්නන්ගේ තිළිණයක් වන්නේය.

وَالَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَآ اُولٰٓئِكَ اَصْحٰبُ الْجَحِيْمِ ﴿٨٧﴾

87. එමෙන්ම අවිශ්වාස කොට, අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළ අය නිරයට හිමිකරුවන් වන්නාහ.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تُحَرِّمُوْا طَيِّبٰتِ مَآ اَحَلَّ اللّٰهُ لَكُمْ وَلَا تَعْتَدُوْا ۗ اِنَّ اللّٰهَ لَا يُحِبُّ الْمُعْتَدِيْنَ ﴿٨٨﴾

88. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් නුඹලා වෙනුවෙන් නීත්‍යානුකූල කර ඇති පවිත්‍ර දේවල් අනීත්‍යානුකූල කර නොගනු. එමෙන්ම සීමාවෙන් ඉක්මවා නොයනු. සීමාවෙන් ඉක්මවා යන්නන්ව, ඇත්තෙන්ම අල්ලාහ් ප්‍රිය නොකරයි.

وَكُلُوْا مِمَّا رَزَقَكُمُ اللّٰهُ حَلٰلًا طَيِّبًا ۖ وَّاتَّقُوا اللّٰهَ الَّذِيْٓ اَنْتُمْ بِهٖ مُؤْمِنُوْنَ ﴿٨٩﴾

89. එමෙන්ම අල්ලාහ් නුඹලාට සපයා ඇති නීත්‍යානුකූල (හලාල්) මෙන්ම පවිත්‍ර දේ අනුභව කරනු. එමෙන්ම නුඹලා විශ්වාස කළ ඔහු වන අල්ලාහ් කෙරෙහි බිය දක්වනු.

لَا يُؤَاخِذُكُمُ اللّٰهُ بِاللَّغْوِ فِيْٓ اَيْمَانِكُمْ وَلٰكِنْ يُّؤَاخِذُكُمْ بِمَا عَقَّدْتُّمُ الْاَيْمَانَ ۚ فَكَفَّارَتُهٗٓ اِطْعَامُ عَشَرَةِ

90. නුඹලාගේ නිෂ්ඵල දිවුරුම් සම්බන්ධයෙන් අල්ලාහ් නුඹලාව හසු කර නොගන්නේය. එහෙත් නුඹලාගේ ස්ථිර දිවුරුම් සම්බන්ධයෙන් ඔහු නුඹලාව හසු කර ගන්නේය. මෙයට වන්දියක් ලෙස නුඹලා නුඹලාගේ

مَسٰكِيْنَ مِنْ اَوْسَطِ مَا تُطْعِمُوْنَ اَهْلِيْكُمْ اَوْ كِسْوَتُهُمْ اَوْ تَحْرِيْرُ رَقَبَةٍ ؕ فَمَنْ لَّمْ يَجِدْ فَصِيَامُ ثَلٰثَةِ اَيَّامٍ ؕ ذٰلِكَ كَفَّارَةُ اَيْمَانِكُمْ اِذَا حَلَفْتُمْ ؕ وَاحْفَظُوْۤا اَيْمَانَكُمْ ؕ كَذٰلِكَ يُبَيِّنُ اللّٰهُ لَكُمْ اٰيٰتِهٖ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿٩٠﴾

නිවැසියන්ට ලබාදෙන්නාවූ සමාන ආහාරය දුගියන් දස දෙනෙකුට දීම හෝ ඔවුනට වස්ත්‍රය ලබාදීම හෝ එක් වහලෙකුව නිදහස් කිරීම වන්නේය. එහෙත් යමෙකුට (හැකියාවක්) නොමැත්තේ නම් තෙදිනක් උපවාසය රැකිය යුතු වන්නේය. නුඹලා ඔවුනට දිවුරුවිට මෙයම නුඹලාගේ දිවුරුම සඳහා වන්දියක් වන්නේය. එමෙන්ම නුඹලාගේ දිවුරුම් ආරක්‍ෂා කරගනු. නුඹලා කෘතඥවීම පිණිස අල්ලාහ්, ඔහුගේ වාක්‍යයන් නුඹලා වෙනුවෙන් මෙලෙස පැහැදිලි කරයි.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِنَّمَا الْخَمْرُ وَالْمَيْسِرُ وَالْاَنْصَابُ وَالْاَزْلَامُ رِجْسٌ مِّنْ عَمَلِ الشَّيْطٰنِ فَاجْتَنِبُوْهُ لَعَلَّكُمْ تُفْلِحُوْنَ ﴿٩١﴾

91. එම්බල විශ්වාසිතයිනි! ඇත්තෙන්ම මත් ද්‍රව්‍යයන්, සූදුව, පිළිම වැඳීම හා ඊතලවලින් ඉලක්ක කොට පංගුව වෙන්කර ගැනීම ෂෛයිතාන්ගේ පිළිකුල් ක්‍රියාව වන්නේය. එබැවින් නුඹලා සාර්ථකවීම පිණිස එයින් (මුළුමනින්ම) වැළකී සිටිනු.

اِنَّمَا يُرِيْدُ الشَّيْطٰنُ اَنْ يُّوْقِعَ بَيْنَكُمُ الْعَدَاوَةَ وَالْبَغْضَآءَ فِى الْخَمْرِ وَالْمَيْسِرِ وَيَصُدَّكُمْ عَنْ ذِكْرِ اللّٰهِ وَعَنِ الصَّلٰوةِ ۚ فَهَلْ اَنْتُمْ مُّنْتَهُوْنَ ﴿٩٢﴾

92. මත් ද්‍රව්‍යයන් හා සූදුව මගින් නුඹලා අතුරෙහි සතුරුකමත්, වෛරයත් ඇති කරමින්, අල්ලාහ් සිහිපත් කිරීමෙන්ද, නමස්කාරයෙන්ද නුඹලාව වළක්වාලීමටම ෂෛයිතාන් කැමැති වන්නේය. එබැවින් නුඹලා වැළකින්නෙහුද?

وَاَطِيْعُوا اللّٰهَ وَاَطِيْعُوا الرَّسُوْلَ وَاحْذَرُوْا ۚ فَاِنْ تَوَلَّيْتُمْ فَاعْلَمُوْۤا اَنَّمَا عَلٰى رَسُوْلِنَا الْبَلٰغُ الْمُبِيْنُ ﴿٩٣﴾

93. එමෙන්ම අල්ලාහ්ට අවනත වනු. දූතයාණන්ටද අවනත වනු. (නුඹලාව) ආරක්ෂා කරගනු. එබැවින් නුඹලා පිටුපෑවේ නම් පණිවිඩය පැහැදිලිව දන්වා සිටීම පමණක් අප දූතයාණන් මත (පැවරී) ඇති බැව් දැනගනු.

لَيْسَ عَلَى الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ جُنَاحٌ فِيمَا طَعِمُوا إِذَا مَا اتَّقَوا وَّآمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ ثُمَّ اتَّقَوا وَّآمَنُوا ثُمَّ اتَّقَوا وَّأَحْسَنُوا ۗ وَاللَّهُ يُحِبُّ الْمُحْسِنِينَ ﴿٩٤﴾

94. විශ්වාසකොට, යහපත් ක්‍රියාවන්හි යෙදෙන අය හට ඔවුන් (අල්ලාහ් කෙරෙහි) බිය දක්වමින්, විශ්වාස කරමින් හා යහපත් ක්‍රියාවන්හි යෙදී, තව දුරටත් (අල්ලාහ් කෙරෙහි) බිය දක්වමින් හා විශ්වාස කරමින් ද, තවත් දුරටත් (අල්ලාහ් කෙරෙහි) බිය දක්වමින් හා කුසල කර්මයෙහි යෙදුණහොත් ඔවුන් අනුභව කරන දැයින් කිසිදු පවක් නැත. එමෙන්ම අල්ලාහ් කුසල කර්මයෙහි යෙදෙන්නන්ව ප්‍රිය කරයි.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَيَبْلُوَنَّكُمُ اللَّهُ بِشَيْءٍ مِّنَ الصَّيْدِ تَنَالُهُ أَيْدِيكُمْ وَرِمَاحُكُمْ لِيَعْلَمَ اللَّهُ مَن يَخَافُهُ بِالْغَيْبِ ۚ فَمَنِ اعْتَدَىٰ بَعْدَ ذَٰلِكَ فَلَهُ عَذَابٌ أَلِيمٌ ﴿٩٥﴾

95. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් ඔහු කෙරෙහි රහසිගතව බිය දක්වන අයව දැනගැනීම පිණිස නුඹලාගේ අත්වලට මෙන්ම නුඹලාගේ හෙල්ලවලට හසු වූ දඩයම් දෙයකින් සත්තකින්ම අල්ලාහ් නුඹලා පරීක්ෂා කරන්නේය. එබැවින් කවුරුන් හෝ මින් පසුවත් සීමාවෙන් ඉක්මවා යන්නේද (එවන් අයහට) වේදනීය දඬුවමක් ඇත.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَقْتُلُوا الصَّيْدَ وَأَنتُمْ حُرُمٌ ۚ وَمَن قَتَلَهُ مِنكُم مُّتَعَمِّدًا فَجَزَاءٌ مِّثْلُ مَا قَتَلَ مِنَ النَّعَمِ يَحْكُمُ بِهِ ذَوَا عَدْلٍ مِّنكُمْ هَدْيًا بَالِغَ الْكَعْبَةِ أَوْ كَفَّارَةٌ طَعَامُ مَسَاكِينَ أَوْ عَدْلُ ذَٰلِكَ صِيَامًا لِّيَذُوقَ وَبَالَ أَمْرِهِ ۗ عَفَا اللَّهُ عَمَّا سَلَفَ ۚ وَمَنْ عَادَ فَيَنتَقِمُ اللَّهُ مِنْهُ ۗ وَاللَّهُ عَزِيزٌ ذُو انتِقَامٍ ﴿٩٦﴾

96. එම්බල විශ්වාසිතයිනි! නුඹලා හජ් වන්දනා (වෙනුවෙන් වස්ත්‍රය ඇඳ සිටි) අවස්ථාවෙහි දඩයම් දේ (සතුන්) ඝාතනය නොකරනු. එමෙන්ම කවුරුන් හෝ නුඹලා අතුරින් සිතාමතාම එය ඝාතනය කළේද, එහි වටිනාකම වනුයේ, ඔහු ඝාතනය කළාවූ දෙයට සමාන සිව්පා සතෙකුය. නුඹලා අතුරෙන් සාධාරණය ඉටුකරන මිනිසුන් දෙදෙනෙක් එය තීරණය කරන්නෝය. සත්ව පරිත්‍යාගයක් ලෙස (එය) කඃබාවට රැගෙන යා යුතු වන්නේය. නැතහොත් එයට වන්දියක් වශයෙන් දුගියන් (කිහිප දෙනෙකු)ට ආහාර දිය යුතු වන්නේය. නැතහොත් ඊට සමාන උපවාසයන් (දින) ගණනක් රැකිය යුතු වන්නේය. (මේවා) ඔහුගේ ක්‍රියාව සඳහා දඬුවම විඳීම පිණිසය. පෙරාතුව සිදුවූ දේ අල්ලාහ් ක්ෂමා කරන්නේය. නමුත් එය නැවතත් (එලෙස) කරන තැනැත්තාට අල්ලාහ් (ඔහුගේ වරදට) දඬුවම් දෙන්නේය. එමෙන්ම අල්ලාහ් බලසම්පන්නය, දඬුවම් දීමට බලය ඇත්තාය.

أُحِلَّ لَكُمْ صَيْدُ الْبَحْرِ وَطَعَامُهُ مَتَاعًا لَّكُمْ وَلِلسَّيَّارَةِ ۖ وَحُرِّمَ عَلَيْكُمْ صَيْدُ الْبَرِّ مَا دُمْتُمْ حُرُمًا ۗ وَاتَّقُوا اللَّهَ الَّذِي إِلَيْهِ تُحْشَرُونَ ﴿٩٧﴾

97. සයුරේ දඩයම හා එහි ආහාරය නුඹලාට නිත්‍යානුකූල කරන ලදී. මෙය නුඹලාගේත් ගමන් ගන්නන්ගේත් ප්‍රයෝජනය වෙනුවෙන්ය. එහෙත් නුඹලා හජ් වන්දනා (වෙනුවෙන් වස්ත්‍රය ඇඳ සිටි) අවස්ථාවෙහි සිටින තාක් ගොඩබිම් දඩයම නුඹලාට තහනම් කරන ලදී. එමෙන්ම අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. ඔහු වෙතම නුඹලා එක්රැස් කරනු ලබන්නෝය.

جَعَلَ اللَّهُ الْكَعْبَةَ الْبَيْتَ الْحَرَامَ قِيَامًا لِّلنَّاسِ وَالشَّهْرَ الْحَرَامَ وَالْهَدْيَ وَالْقَلَائِدَ ۚ ذَٰلِكَ لِتَعْلَمُوا أَنَّ اللَّهَ يَعْلَمُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ وَأَنَّ اللَّهَ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿٩٨﴾

98. අල්ලාහ් කෑබාව නම් පාරිශුද්ධ වූ නිවස මිනිස් සංහතිය උදෙසා (ලෞකික හා අධ්‍යාත්මික) සමෘද්ධිය සහ අභිවෘද්ධිය තකා සාදා ඇත්තේය. එමෙන්ම ශුද්ධ වූ මාසයද, සත්ව පරිත්‍යාගයද. කරපටි (දමා ඇති සතුන්)ද (එලෙසම කර ඇත්තේය.) මෙය අහසහි ඇති දේ මෙන්ම පොළොවෙහි ඇති දේ (සියල්ල) පිළිබඳව අල්ලාහ් මැනැවින් දන්නා බවත් එමෙන්ම අල්ලාහ් සියළු දේ දත්තා බවත් නුඹලා දැනගැනීම පිණිස වේ.

اعْلَمُوا أَنَّ اللَّهَ شَدِيدُ الْعِقَابِ وَأَنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٩٩﴾

99. ඇත්තෙන්ම අල්ලාහ් දඬුවම් දීමේදී ඉතා දැඩි බවත්, තවද ඇත්තෙන්ම අල්ලාහ් ඉතා ක්ෂමාන්විත හා පරම දයාබර බවත් දැනගනු.

مَّا عَلَى الرَّسُولِ إِلَّا الْبَلَاغُ ۗ وَاللَّهُ يَعْلَمُ مَا تُبْدُونَ وَمَا تَكْتُمُونَ ﴿١٠٠﴾

100. පණිවිඩය දන්වා සිටීම පමණක් දූතයාණන් මත (පැවරී) ඇත්තේය. එමෙන්ම නුඹලා අනාවරණය කරන දෙයත් නුඹලා සඟවන දෙයත් අල්ලාහ් මැනැවින් දන්නේය.

قُل لَّا يَسْتَوِي الْخَبِيثُ وَالطَّيِّبُ وَلَوْ أَعْجَبَكَ كَثْرَةُ الْخَبِيثِ ۚ فَاتَّقُوا اللَّهَ يَا أُولِي الْأَلْبَابِ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿١٠١﴾ ع

101. 'නරක බහුල වශයෙන් තිබීම ඔබව විස්මයකට පත් කළ වුවද, නරකත් හොඳත් එක සමාන විය නොහැකි යැ'යි ඔබ පවසන්න. එහෙයින් වටහාගන්නා මිනිසුනි! නුඹලා සමෘද්ධිමත් වීම පිණිස අල්ලාහ් කෙරෙහි බිය දක්වනු.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَسْأَلُوا عَنْ أَشْيَاءَ

102. එම්බල විශ්වාසිතයිනි! නුඹලාට අනාවරණය කරනු ලැබුවේ නම්

إِن تُبْدَ لَكُمْ تَسُؤْكُمْ ۚ وَإِن تَسْأَلُوا عَنْهَا حِينَ يُنَزَّلُ الْقُرْآنُ تُبْدَ لَكُمْ ۖ عَفَا اللَّهُ عَنْهَا ۗ وَاللَّهُ غَفُورٌ حَلِيمٌ ﴿١٠٢﴾

*නුඹලාට වේදනාව ගෙන දෙන්නාවූ දේවල් පිළිබඳව ප්‍රශ්ණ නොකරනු. එහෙත් කුර්ආන් පහළ කරනු ලබන අවධියේදී නුඹලා ඒවා පිළිබඳව ප්‍රශ්ණ කළේ නම් ඒවා නුඹලා වෙනුවෙන් අනාවරණය කරනු ලබන්නේය. අල්ලාහ් (කරුණාවන්තකම නිසා) ඒවා හැර දමා ඇත්තේය. (එමෙන්ම) අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, ඉවසිලිවන්තය.

قَدْ سَأَلَهَا قَوْمٌ مِّن قَبْلِكُمْ ثُمَّ أَصْبَحُوا بِهَا كَافِرِينَ ﴿١٠٣﴾

103. නුඹලාට පෙර එක් ජන පිරිසක් ඒ (දේවල්) පිළිබඳව ප්‍රශ්ණ කළහ. (එහෙත්) පසුව ඔවුහු ඒ නිසාම අවිශ්වාසිතයන් වූහ.

مَا جَعَلَ اللَّهُ مِن بَحِيرَةٍ وَلَا سَائِبَةٍ وَلَا وَصِيلَةٍ وَلَا حَامٍ ۙ وَلَٰكِنَّ الَّذِينَ كَفَرُوا يَفْتَرُونَ عَلَى اللَّهِ الْكَذِبَ ۖ وَأَكْثَرُهُمْ لَا يَعْقِلُونَ ﴿١٠٤﴾

*104. අල්ලාහ් කිසිඳු බහිරාවද සාඉබාවද වසිලාවද හාම්වද නියම කළේ නැත. එහෙත් අවිශ්වාසිතයින් අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නෝය. තවද ඔවුන්ගෙන් බොහෝ අය වටහා නොගන්නෝය.

*සටහන. 102: විශ්වාසවන්තයින්ට කරදර කිරීමේ අදහසින් අල්ලාහ් දෙවියන් විසින් නියම කරන ලද ක්‍රියා මාර්ගයක් නොමැත. තවද සමහරුන්ට සුළු දේවල් පිළිපැදීමට අපහසු නිසාත් අනවශ්‍ය කරදර ඔවුනට ඇතිවීම නිසාත් අල්ලාහ් දෙවියන්, ඔහුගේ කරුණාව හේතු කොටගෙන සුළු දේවල් කෙරෙහි අණ කිරීමට කැමති වන්නේ නැත.

*සටහන. 104: 'බහිරා' යනු කන් ඉරා නිදැල්ලේ බුදින්නට ඉඩ හරින ලද පැටවුන් සත් දෙනෙක් වැදූ ඔටුදෙනකට අශිෂ්ඨ අරාබින් විසින් දෙන ලද නාමයකි. ඇයව යම් දෙවියෙකුට කැප කරන ලද අතර ඇයගේ කිරි සහ පිට භාවිතයට නොගන්නා ලදි. 'සාඉබා' යනු පැටවුන් පස් දෙනෙක් වැදූ නිදැල්ලේ ජලය පානය කර තණ කෑම සඳහා හරින ලද ඔටුදෙනකි. 'වසීලා' යනු දෙවියෙකු වෙනුවෙන් මුදා හරින ලද හා නොකඩවා ගැහැණු සතුන් සත් දෙනක් වැදූ ඔටු දෙනක් හෝ (බැටළු දෙනක් හෝ එළු දෙනක්)ය. සත්වන වතාවට ගැහැණු හා පිරිමි ජෝඩුවක් වැදුවේ නම් එම සතුන්වද නිදැල්ලේ මුදා හරින ලදි. 'හාම්' යනු පැටවුන් දස දෙනෙකු බෝ කරන ලද ඔටුවෙක්ය. බර පැටවීමට හෝ ගමන් කිරීමට භාවිතා නොකර එම සතා නිදැල්ලේ හරින ලදි. එම සතා තණ කෑම සහ ජලය පානය කිරීමට මුදා හරින ලදි.

මනුෂ්‍යයා හරියාකාරව සිතන පරිදි සුළු සහ විස්තරාත්මක දේ නීතිගත කිරීමට ඔහුට ඉඩ හරින ලදයැයි සඳහන් කිරීමෙන් අනතුරුව මෙම වාක්‍යය මූලධර්මයන්හි නිදහස සහා අභිමතයන් අනුමත නොකර ඇත යන සත්‍යය වෙතට උචිත අන්දමින් අවධානය යොමු කරන්නේය. ඒ මක් නිසාදයත් මූලධර්මයන් හි ඒකමතික තීරණයන් අවශ්‍ය බවත් ප්‍රතිවිරුද්ධ අදහස් අතිශයින්ම හානිදායක විය හැකි බවත්ය.

මූලධර්ම විෂයන් පිළිබඳව නීති සකස් කිරීමෙහිලා මනුෂ්‍ය බුද්ධිය විශ්වාස කළනොහැකි බව මෙම වාක්‍යය උදාහරණයකින් පෙන්නුම් කරන්නේය. අරාබිවරුන් තම පිළිමයන්ට ගරු කිරීම පිණිස මෙම සතුන් නිදැල්ලේ හැරීමට පුරුදුවී සිටි බව මෙම

وَاِذَا قِيْلَ لَهُمْ تَعَالَوْا اِلٰى مَآ اَنْزَلَ اللّٰهُ
وَاِلَى الرَّسُوْلِ قَالُوْا حَسْبُنَا مَا وَجَدْنَا
عَلَيْهِ اٰبَآءَنَا ؕ اَوَلَوْ كَانَ اٰبَآؤُهُمْ
لَا يَعْلَمُوْنَ شَيْـًٔا وَّلَا يَهْتَدُوْنَ ﴿١٠٥﴾

105. තවද 'අල්ලාහ් පහළ කර ඇති දේ වෙත හා දූතයාණන් වෙත පැමිණෙනුයි' ඔවුන්ට කියනු ලබන විට ඔවුන් 'අපගේ මුතුන්මිත්තන් කුමක් මත සිටියේද, එයම අපට සෑහේයැ'යි කියති. කිමද! ඔවුන්ගේ මුතුන්මිත්තන් කිසිවක් නොදන්නවුන් මෙන්ම මගපෙන්වීමක් නොලබන්නන්ව සිටියවුවද?

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا عَلَيْكُمْ اَنْفُسَكُمْ ۚ
لَا يَضُرُّكُمْ مَّنْ ضَلَّ اِذَا اهْتَدَيْتُمْ ؕ
اِلَى اللّٰهِ مَرْجِعُكُمْ جَمِيْعًا فَيُنَبِّئُكُمْ
بِمَا كُنْتُمْ تَعْمَلُوْنَ ﴿١٠٦﴾

106. එම්බල විශ්වාසිතයිනි! නුඹලා නුඹලාගේ ආත්මයන්ට වගකිවයුත්තන්ය. නුඹලා යහමග ලද විට, වැරදි මග යන කිසිවෙක් නුඹලාට හානි කළ නොහැක. නුඹලා සියල්ලෝම අල්ලාහ් වෙත ආපසු යායුතු වන්නේය. පසුව නුඹලා කරමින් සිටි දේ පිළිබඳව ඔහු නුඹලාට හෙළි කරන්නේය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا شَهَادَةُ بَيْنِكُمْ اِذَا
حَضَرَ اَحَدَكُمُ الْمَوْتُ حِيْنَ الْوَصِيَّةِ
اثْنٰنِ ذَوَا عَدْلٍ مِّنْكُمْ اَوْ اٰخَرٰنِ
مِنْ غَيْرِكُمْ اِنْ اَنْتُمْ ضَرَبْتُمْ فِى
الْاَرْضِ فَاَصَابَتْكُمْ مُّصِيْبَةُ الْمَوْتِ ؕ
تَحْبِسُوْنَهُمَا مِنْۢ بَعْدِ الصَّلٰوةِ فَيُقْسِمٰنِ
بِاللّٰهِ اِنِ ارْتَبْتُمْ لَا نَشْتَرِىْ بِهٖ ثَمَنًا وَّلَوْ
كَانَ ذَا قُرْبٰى ۙ وَلَا نَكْتُمُ شَهَادَةَ اللّٰهِ اِنَّاۤ

107. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගෙන් කෙනෙකුට මරණාසන්නය පැමිණිවිට අන්තිම කැමැති ප්‍රකාශය කරන මොහොතේදී නුඹලා අතුරින් යුක්තිගරුක පුරුෂයින් දෙදෙනෙකු නුඹලා අතර (නිසි) සාක්ෂි දැරීමට සිටිය යුතු වන්නේය. නැතහොත් නුඹලා භූමියෙහි සංචාරය කරන්නේ නම් නුඹලාට මරණාසන්නය පැමිණිවිට නුඹලාගෙන් නොවන අන් දෙදෙනෙකු සිටිය යුතු වන්නේය. නුඹලා ඔවුන් දෙදෙනාව නමස්කාරයට පසු (සාක්ෂි දැරීමට) රඳවා ගනු. (ඔවුන්ගේ සාක්ෂිය පිළිබඳව) නුඹලා සැක කරන්නේ නම්, ඔවුන් දෙදෙනා 'ඔහු අපගේ සමීප ඥාතියෙකු වුවත් අපි මේ වෙනුවට කිසිවක් ලබා නොගත්තෙමු. (අණකරන ලද) අල්ලාහ්ගේ සාක්ෂිය

වාක්‍යයෙහි සඳහන් වී ඇත. අවිශ්වාස සහා මිත්‍යයාව පදනම් කරගැනීමට අමතරව ඔවුන් අනුගමනය කළේ අතිශයින්ම මෝඩ ක්‍රියාවන්ය. මේ අකාරයට නිදැල්ලේ හරින ලද සතුන් ගිය තැන මහා විනාශයක් වුයේය. අල්කුරානය මනුෂ්‍යයා විසින් සාදන ලද නීතිය නරක ක්‍රියා දාමයට උදාහරණයක් ලෙස සඳහන් කරයි. තවද අනාවරණය කරන ලද නීතියේ ප්‍රඥාව පිළිබඳව ප්‍රශ්න කරන කිතුනුවන්ට අවවාද කරන අතර අශිෂ්ඨ අරාබිවරුන් අනුගමනය කළ අයහපත් ගතිගුණ වලින් පාඩමක් ඉගෙන ගන්නටය. ඒ මක්නිසාද යත් අශිෂ්ඨ අරාබිවරුන්ට අනාවරණය වූ නීතියක් නොතිබුණු නිසාය.

إِذًا لَّمِنَ الْاٰثِمِيْنَ ﴿١٠٧﴾

අපි නොසඟවිමු. එසේ වුවා නම්, සත්තකින්ම අපි පාපකාරීන් අතර වන්නෙමු'යි (පවසා) අල්ලාහ් මත දිවුරිය යුතුය.

فَاِنْ عُثِرَ عَلٰۤى اَنَّهُمَا اسْتَحَقَّاۤ اِثْمًا فَاٰخَرٰنِ يَقُوْمٰنِ مَقَامَهُمَا مِنَ الَّذِيْنَ اسْتَحَقَّ عَلَيْهِمُ الْاَوْلَيٰنِ فَيُقْسِمٰنِ بِاللّٰهِ لَشَهَادَتُنَاۤ اَحَقُّ مِنْ شَهَادَتِهِمَا وَمَا اعْتَدَيْنَاۤ ۖ اِنَّاۤ اِذًا لَّمِنَ الظّٰلِمِيْنَ ﴿١٠٨﴾

* 108. නමුත් දෙදෙනා (බොරු සාක්ෂි කීමෙහි) පාපය කළ බවට තහවුරු වුයේ නම්, උරුමය අහිමිවූ අය අතුරින් දෙදෙනෙක් ඔවුන්ගේ ස්ථානයේ සාක්ෂිකරුවන් වශයෙන් නැගී සිටිය යුතුය. පසුව 'මොවුන් දෙදෙනාගේ සාක්ෂියට වඩා අප දෙදෙනාගේ සාක්ෂිය ඉතාමත් සත්‍යය යැයිද, එමෙන්ම අපි සීමාව ඉක්මවා නොගියේ යැයිද, අප එසේ කළේ නම්, සත්තකින්ම අපි සීමාව ඉක්මවායන්නන් අතර වන්නන් යැ'යි අල්ලාහ් මත දිවුරා ඔවුන් දෙදෙනා කිව යුතුය.

ذٰلِكَ اَدْنٰۤى اَنْ يَّاْتُوْا بِالشَّهَادَةِ عَلٰى وَجْهِهَاۤ اَوْ يَخَافُوْۤا اَنْ تُرَدَّ اَيْمَانٌۢ بَعْدَ اَيْمَانِهِمْ ۗ وَاتَّقُوا اللّٰهَ وَاسْمَعُوْا ۗ وَاللّٰهُ لَا يَهْدِى الْقَوْمَ الْفٰسِقِيْنَ ﴿١٠٩﴾

109. මෙලෙස ඔවුන්ගේ සත්‍ය දිවුරුමෙහි (එය ඔවුන් මත පීඩනයක් ඇතිවන්නට ඉඩ ඇති බැවින්) ඔවුන් රැඳිසිටීමටත් ඔවුන්ගේ දිවුරුමට පසු වෙනත් දිවුරුම් පැමිණිය හැකි යැයි ඔවුනට බියක් ඇති වීමටත් තුඩු දිය හැක. තවද අල්ලාහ් කෙරෙහි බිය වනු. එමෙන්ම සවන් දෙනු. එමෙන්ම අල්ලාහ් අවනත නොවන ජනතාවට මග නොපෙන්වයි.

يَوْمَ يَجْمَعُ اللّٰهُ الرُّسُلَ فَيَقُوْلُ مَاذَاۤ اُجِبْتُمْ ۗ قَالُوْا لَا عِلْمَ لَنَا ۗ اِنَّكَ اَنْتَ عَلَّامُ الْغُيُوْبِ ﴿١١٠﴾

110. අල්ලාහ් දූතයන්ව එක්රැස් කරමින් 'ඔබලාට කුමන පිළිතුරක් දෙනු ලැබුවේ දැ'යි විමසන්නා වූ දිනය (සිහිපත් කරනු.) ඔවුහු, 'අපට කිසිඳු දැනුමක් නොමැත. ඇත්තෙන්ම ඔබම ගුප්ත දෑ පිළිබඳව බෙහෙවින් නුවණැත්තා යැ'යි පවසන්නෝය.

اِذْ قَالَ اللّٰهُ يٰعِيْسَى ابْنَ مَرْيَمَ اذْكُرْ نِعْمَتِىْ عَلَيْكَ وَعَلٰى وَالِدَتِكَ ۘ اِذْ اَيَّدْتُّكَ

111. එවිට අල්ලාහ්, 'ඕ මරියම් ගේ පුත් ඊසා! ඔබ කෙරෙහිද ඔබගේ මෑණියන් කෙරෙහිද මා කළාවූ අනුග්‍රහය සිහිපත් කරන්න. මා ශුද්ධාත්මයෙන් ඔබව ශක්තිමත් කළ

* සටහන. 108: මෙම වාක්‍යයෙන් නිරූපණය වන සිද්ධිය වන්නේ සියළු සාක්ෂීන් එහි ඉදිරිපත් වීමේදී දිවුරුම් දීමේ මූලිකත්වය දෙනු ලබන්නේ සමීපතම පළමු පෙළේ ඥාතීන් දෙදෙනාටය. ඉහත 107 වන වාක්‍යයේ මෙය විද්‍යමාන වේ.

بِرُوحِ الْقُدُسِ ۖ تُكَلِّمُ النَّاسَ فِي
الْمَهْدِ وَكَهْلًا ۖ وَإِذْ عَلَّمْتُكَ الْكِتَابَ
وَالْحِكْمَةَ وَالتَّوْرَاةَ وَالْإِنْجِيلَ ۖ وَإِذْ
تَخْلُقُ مِنَ الطِّينِ كَهَيْئَةِ الطَّيْرِ بِإِذْنِي
فَتَنْفُخُ فِيهَا فَتَكُونُ طَيْرًا بِإِذْنِي ۖ وَتُبْرِئُ
الْأَكْمَهَ وَالْأَبْرَصَ بِإِذْنِي ۖ وَإِذْ تُخْرِجُ
الْمَوْتَىٰ بِإِذْنِي ۖ وَإِذْ كَفَفْتُ بَنِي
إِسْرَائِيلَ عَنْكَ إِذْ جِئْتَهُمْ بِالْبَيِّنَاتِ
فَقَالَ الَّذِينَ كَفَرُوا مِنْهُمْ إِنْ هَٰذَا إِلَّا
سِحْرٌ مُبِينٌ ﴿١١١﴾

*කල්හි, ඔබ තොටිල්ලෙහිද, මැදිවියේද මිනිසුන්ට කථා කළේය. තවද මා ඔබට පුස්තකය හා ප්‍රඥාව ද තව්රාත් හා ඉන්ජීල් ද ඉගැන්වූ අවස්ථාව (සිහි කරන්න). එමෙන්ම මාගේ විධානයෙන් පක්ෂියෙකුගේ ස්වරූපයෙන් යුතු (මැවීමක්) ඔබ මැටියෙන් නිර්මාණය කළ කල්හි, ඔබ එහි (නව ප්‍රාණයක්) පිඹූ විට, එය මාගේ විධානයෙන් ඉහළින් පියාසර කරන්නක් බවට පත්විය. තවද ඔබ රැ-ඇඳිරියන් හා කුෂ්ඨ රෝගීන් මාගේ විධානයෙන් සුවපත් කළේය. එමෙන්ම ඔබ මාගේ විධානයෙන් මළවුන්ව නැගිට්ට වූ කල්හි ද, ඔබ ඔවුන් වෙත පැහැදිලි සළකුණු රැගෙන ආ විට (ඔබව ඝාතනය කිරීමට තැත්කල) ඉස්රාඊලයේ දරුවන්ව මා වළක්වා ගත් කල්හි, එවිට ඔවුනතුරින් ප්‍රතික්ෂේප කළ අයවලුන් "මෙය ඉතා පැහැදිලි මායාවක්" යැයි කිවූ අවස්ථාවද (සිහිපත් කරන්නැ)' යි පවසන්නේය.

وَإِذْ أَوْحَيْتُ إِلَى الْحَوَارِيِّينَ أَنْ آمِنُوا بِي
وَبِرَسُولِي قَالُوا آمَنَّا وَاشْهَدْ بِأَنَّنَا
مُسْلِمُونَ ﴿١١٢﴾

112. තවද මා (ඊසාගේ) ගෝලපිරිසට, 'මා කෙරෙහිත් මාගේ දූතයාණන් කෙරෙහිත් විශ්වාස කරනු'යි සිත්තුල කාවැද්දූ විට ඔවුන්, 'අපි විශ්වාස කළෙමු. තවද අප අවනත වී ඇති බවට ඔබ සාක්ෂි දරන්නැ'යි කිවූ අවස්ථාවද (සිහිපත් කරන්න).

إِذْ قَالَ الْحَوَارِيُّونَ يَا عِيسَى ابْنَ مَرْيَمَ
هَلْ يَسْتَطِيعُ رَبُّكَ أَنْ يُنَزِّلَ عَلَيْنَا مَائِدَةً

113. 'ඕ මර්යම්ගේ පුත් ඊසා! අප වෙනුවෙන් ආහාරවලින් පිරුණු තැටියක් අහසින් පහළ කරවීමට ඔබගේ අධිපතියාණන්ට හැකියාවක්

* සටහන. 111: මෙම වාක්‍යය විධියෙන් අදහස් වන්නේ ඊසා ප්‍රඥාසම්පන්නව හා දෙව් බැතිමත් වදන් කථා කල අතර ඔහුගේ ළමා වියේ සිට මැදිවිය දක්වා එය නොකඩවා පවත්වාගෙන ගියේය. 'කහ්ලන්' යන අරාබි වදනින් අදහස් වන්නේ යමෙකුගේ හිස කෙස් පැහෙන අවධියේ සිට වියපත් බවට පත් වන කාල සීමාවයි.

මෙම වාක්‍යය විධි උපමානුසාරයෙන් ප්‍රකාශ වන්නේ අධ්‍යාත්මික විප්ලවය දෙවියන්ගේ වක්තෘවරුන් මගින් ගෙන ආ බවයි. ඊසාගේ විශේෂ ගුණාංගයන්ට මෙය ප්‍රණාමයකි. ඔහුව මෙවන් ආශ්චර්ය්‍යජනක විපර්යාසයන් ගෙන හැර පෑම සඳහා ආදර්ශයක් ලෙස දෙවියන් සියලු වක්තෘන්ගෙන් තෝරාගනු ලැබුවේය.

مِّنَ السَّمَآءِ ۖ قَالَ اتَّقُوا اللّٰهَ اِنْ كُنْتُمْ
مُّؤْمِنِيْنَ ﴿١١٣﴾

තිබේද..?'යි ගෝලපිරිස කියූ කල්හි ඔහු 'නුඹලා විශ්වාසිතයින් වන්නේ නම්, අල්ලාහ් කෙරෙහි බිය දක්වනු'යි කීවේය.

قَالُوْا نُرِيْدُ اَنْ نَّاْكُلَ مِنْهَا وَتَطْمَئِنَّ
قُلُوْبُنَا وَنَعْلَمَ اَنْ قَدْ صَدَقْتَنَا وَنَكُوْنَ
عَلَيْهَا مِنَ الشّٰهِدِيْنَ ﴿١١٤﴾

114. ඔවුහු 'අප එයින් අනුභව කිරීමටත්, තවද අපගේ හදවත් සැනසීමකට පත්වීමටත්, තවද ඔබ අපට සත්‍යය පැවසී ඇතැයි අප දැන ගැනීමටත්, තවද ඒ සඳහා අප සාක්ෂිකරුවන් වීමටත් අපි කැමැති වෙමු'යි කීහ.

قَالَ عِيْسَى ابْنُ مَرْيَمَ اللّٰهُمَّ رَبَّنَآ
اَنْزِلْ عَلَيْنَا مَآئِدَةً مِّنَ السَّمَآءِ تَكُوْنُ لَنَا
عِيْدًا لِّاَوَّلِنَا وَاٰخِرِنَا وَاٰيَةً مِّنْكَ ۚ
وَارْزُقْنَا وَاَنْتَ خَيْرُ الرّٰزِقِيْنَ ﴿١١٥﴾

115. මර්යම් ගේ පුත් ඊසා 'ඕ අල්ලාහ්! අපගේ අධිපතියාණෙනි! අපගෙන් පළමු අයටත්, අපගෙන් අවසන් අයටත් ප්‍රීති උත්සවයක් වීමටද, ඔබ වෙතින් සළකුණක්ද වන්නාවූ ආහාරවලින් පිරුණු තැටියක් අහසින් අප වෙත පහළ කරනු මැනව! එමෙන්ම අපව පෝෂණය කරනු මැනව. එමෙන්ම ඔබ පෝෂණය කරන්නන් ගෙන් වඩාත් ශ්‍රේෂ්ඨවන්තයා වන්නැ'යි කීවේය.

قَالَ اللّٰهُ اِنِّيْ مُنَزِّلُهَا عَلَيْكُمْ ۚ فَمَنْ
يَّكْفُرْ بَعْدُ مِنْكُمْ فَاِنِّيْۤ اُعَذِّبُهٗ عَذَابًا
لَّاۤ اُعَذِّبُهٗۤ اَحَدًا مِّنَ الْعٰلَمِيْنَ ﴿١١٦﴾

116. 'ඇත්තෙන්ම මම එය නුඹලාට පහළ කරන්නෙමි. එහෙත් මින්පසුද නුඹලාගෙන් කවරෙකු හෝ අවිශ්වාස කරන්නේද, මා එවැනි අයට මුළු ලොවේ වෙනත් කිසිවෙකුට නොදුන්නාවූ දඬුවමකින් මම දඬුවම් කරන්නෙමි'යි අල්ලාහ් පැවසුවේය.

وَاِذْ قَالَ اللّٰهُ يٰعِيْسَى ابْنَ مَرْيَمَ ءَاَنْتَ
قُلْتَ لِلنَّاسِ اتَّخِذُوْنِيْ وَاُمِّيَ اِلٰهَيْنِ
مِنْ دُوْنِ اللّٰهِ ۖ قَالَ سُبْحٰنَكَ مَا يَكُوْنُ
لِيْۤ اَنْ اَقُوْلَ مَا لَيْسَ لِيْ ۗ بِحَقٍّ ۖ اِنْ
كُنْتُ قُلْتُهٗ فَقَدْ عَلِمْتَهٗ ۖ تَعْلَمُ مَا فِيْ
نَفْسِيْ وَلَاۤ اَعْلَمُ مَا فِيْ نَفْسِكَ ۖ اِنَّكَ

117. තවද අල්ලාහ් "ඕ මර්යම්ගේ පුත් ඊසා! මිනිසුන් වෙත 'අල්ලාහ් හැරෙන්නට මාවද මාගේ මෑණියන්වද දෙවිවරුන් දෙදෙනෙකු වශයෙන් අදහනු'යි ඔබ කිවෙහිද..?"යි විමසන කල්හි, ඔහු 'ඔබ පාරිශුද්ධය, මා හට අයිති නැති එවැනි දෙයක් පැවසීම කිසිසේත් මාගෙන් විය නොහැක. මා එසේ පැවසුවා නම් සත්තකින්ම ඔබ එය දැනගන්නේමය. ඔබ මාගේ සිතෙහි ඇති දේ දන්නේමය. එහෙත් ඔබගේ සිතෙහි ඇති දේ මම නොදනිමි. ඇත්තෙන්ම ඔබ පමණක් (සියලු)

أَنتَ عَلَّامُ الْغُيُوبِ ﴿١١٧﴾

ගුප්ත දේ ගැන බෙහෙවින් නුවණැත්තා යැ'යි පිළිතුරු දෙන්නේය.

مَا قُلْتُ لَهُمْ إِلَّا مَا أَمَرْتَنِي بِهِ أَنِ اعْبُدُوا اللَّهَ رَبِّي وَرَبَّكُمْ ۚ وَكُنتُ عَلَيْهِمْ شَهِيدًا مَّا دُمْتُ فِيهِمْ ۖ فَلَمَّا تَوَفَّيْتَنِي كُنتَ أَنتَ الرَّقِيبَ عَلَيْهِمْ ۚ وَأَنتَ عَلَىٰ كُلِّ شَيْءٍ شَهِيدٌ ﴿١١٨﴾

118. ''මම නම් ඔවුන් වෙත, 'මාගේ අධිපතියාණන්ද නුඹලාගේ අධිපතියාණන්ද වන අල්ලාහ්ට නමදිනු'යි ඔබ මා හට අණකළ දේ විනා අන්කිසිවක් නොකීවෙමි. එමෙන්ම මා ඔවුනතුරෙහි සිටි තාක් මම ඔවුන් කෙරෙහි සාක්ෂිකරුවෙකු ලෙස සිටියෙමි. එහෙත් ඔබ මා හට මරණය දුන් පසු ඔබ ඔවුන් කෙරෙහි සුපරීක්ෂකයෙකුව සිටියෙහිය. එමෙන්ම ඔබ සියලු දේ කෙරෙහි සාක්ෂිකරුවෙක්ය.

إِن تُعَذِّبْهُمْ فَإِنَّهُمْ عِبَادُكَ ۖ وَإِن تَغْفِرْ لَهُمْ فَإِنَّكَ أَنتَ الْعَزِيزُ الْحَكِيمُ ﴿١١٩﴾

119. ඔබ ඔවුනට දඬුවම් දෙන්නේ නම්, ඔවුහු ඔබගේ දාසයෝ නොවේද!. එමෙන්ම ඔබ ඔවුනට ක්ෂමාව දෙන්නේ නම්, ඇත්තෙන්ම ඔබ බලසම්පන්නය, මහා ප්‍රඥා සම්පන්නය''.

قَالَ اللَّهُ هَٰذَا يَوْمُ يَنفَعُ الصَّادِقِينَ صِدْقُهُمْ ۚ لَهُمْ جَنَّاتٌ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا أَبَدًا ۚ رَّضِيَ اللَّهُ عَنْهُمْ وَرَضُوا عَنْهُ ۚ ذَٰلِكَ الْفَوْزُ الْعَظِيمُ ﴿١٢٠﴾

120. අල්ලාහ් පවසන්නේය, 'සත්‍යවාදීන්ට තමන්ගේ සත්‍යය මගින් ඵල දරන්නා වූ දිනය මෙය වේ'. ඔවුන් සඳහා උද්‍යානයන් ඇත, ඒවාට පහළින් ගංගාවන් ගලා බසිති. ඒවායෙහි ඔවුහු සදාකල් වෙසෙන්නෝය. අල්ලාහ් ඔවුන් ගෙන් බෙහෙවින් තෘප්තිමත් විය. එමෙන්ම ඔවුහු ඔහුගෙන් තෘප්තිමත් වූහ. මෙය ඉමහත්වූ ජයග්‍රහණයකි.

لِلَّهِ مُلْكُ السَّمَاوَاتِ وَالْأَرْضِ وَمَا فِيهِنَّ ۚ وَهُوَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿١٢١﴾

121. අහස් හා පොළොව මෙන්ම ඒවායේ තිබෙන සියලු දේහි රාජ්‍යය අල්ලාහ්ටම හිමි වන්නේය. එමෙන්ම ඔහු සියලු දේ කෙරෙහි බලසම්පන්නය.




අල් අන්ආම්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

2. අහසද පොළොවද මවා, සියළු ආකාරයේ අන්ධකාරද, ආලෝකයද ඇති කළ අල්ලාහ්ටම සියලු ප්‍රශංසා හිමිවේ. එසේ වුවද අවිශ්වාසිත අය තමන්ගේ අධිපතියාණන්ට සමානයන් තබන්නෝය.

ٱلۡحَمۡدُ لِلَّهِ ٱلَّذِي خَلَقَ ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضَ وَجَعَلَ ٱلظُّلُمَٰتِ وَٱلنُّورَۖ ثُمَّ ٱلَّذِينَ كَفَرُواْ بِرَبِّهِمۡ يَعۡدِلُونَ ②

3. නුඹලාව මැටි පසින් මැව්වේ ඔහුමය. පසුව ඔහු නියමිත කාල පරිච්ඡේදයක් නියම කළේය. තවද ඔහු වෙත නියම කරන ලද (තවත්) කාල පරිච්ඡේදයක් ඇත. එසේ වුවද නුඹලා සැක කරන්නෙහුය!.

هُوَ ٱلَّذِي خَلَقَكُم مِّن طِينٖ ثُمَّ قَضَىٰٓ أَجَلٗاۖ وَأَجَلٞ مُّسَمًّى عِندَهُۥۖ ثُمَّ أَنتُمۡ تَمۡتَرُونَ ③

4. අහස්හිද පොළොවෙහිද අල්ලාහ් ඔහුමය. නුඹලාගේ රහස්ද නුඹලාගේ ප්‍රත්‍යක්ෂ දෙයද ඔහු දනී. එමෙන්ම නුඹලා උපයන දෙයද ඔහු දනී.

وَهُوَ ٱللَّهُ فِي ٱلسَّمَٰوَٰتِ وَفِي ٱلۡأَرۡضِۖ يَعۡلَمُ سِرَّكُمۡ وَجَهۡرَكُمۡ وَيَعۡلَمُ مَا تَكۡسِبُونَ ④

5. ඔවුන්ගේ අධිපතියාණන්ගේ සළකුණු වලින් කවර සළකුණක් හෝ ඔවුන් වෙත පැමිණියද, ඔවුහු එය ප්‍රතික්ෂේප කරති.

وَمَا تَأۡتِيهِم مِّنۡ ءَايَةٖ مِّنۡ ءَايَٰتِ رَبِّهِمۡ إِلَّا كَانُواْ عَنۡهَا مُعۡرِضِينَ ⑤

6. එබැවින් සත්‍යය ඔවුන් වෙත පැමිණි කල්හි එය ඔවුහු ප්‍රතික්ෂේප කළහ. එහෙත් ඔවුන් සරදම් කරමින් සිටි දැයෙහි ආරංචි කඩිනමින් ඔවුනට ලැබෙනු ඇත.

فَقَدۡ كَذَّبُواْ بِٱلۡحَقِّ لَمَّا جَآءَهُمۡۖ فَسَوۡفَ يَأۡتِيهِمۡ أَنۢبَٰٓؤُاْ مَا كَانُواْ بِهِۦ يَسۡتَهۡزِءُونَ ⑥

7. ඔවුන්ට කලින් විවිධ කාලයන්හි කොතරම් ජන සමූහයන් අප විනාශ කළෙමු දැයි ඔවුන් නොදකින්නේද? අප නුඹලාව

أَلَمۡ يَرَوۡاْ كَمۡ أَهۡلَكۡنَا مِن قَبۡلِهِم مِّن قَرۡنٖ مَّكَّنَّٰهُمۡ فِي ٱلۡأَرۡضِ مَا لَمۡ نُمَكِّن

ශක්තිමත් නොකළ අන්දමින් අපි ඔවුන්ව පොළොවෙහි ශක්තිමත් කළෙමු. තවද ඔවුනට ඉහළින් මහ වැසි ඇදහැළෙන්නාවූ වලාකුළු අපි එව්වෙමු. තවද අපි ඔවුනට පහළින් ගංගාවන් ගලා යෑමට සැලැස්සුවෙමු. අනතුරුව ඔවුන්ගේ පාපයන් හේතුකොට ගෙන අපි ඔවුන්ව විනාශ කර ඔවුන්ට පසු තවත් ජන සමූහයක් බිහි කළෙමු.

لَّكُمْ وَأَرْسَلْنَا السَّمَاءَ عَلَيْهِم مِّدْرَارًا وَجَعَلْنَا الْأَنْهَارَ تَجْرِي مِن تَحْتِهِمْ فَأَهْلَكْنَاهُم بِذُنُوبِهِمْ وَأَنشَأْنَا مِن بَعْدِهِمْ قَرْنًا آخَرِينَ ٧

8. පත්‍රයන්හි ලියන ලද ලියවිලි අප ඔබ වෙත පහළ කර, එය ඔවුහු තමන්ගේ අත්වලින් ස්පර්ශ කර තිබුණද, 'මෙය ඉතා පැහැදිලි විජ්ජාවක් යැ'යි අවිශ්වාසිතයෝ නියතවශයෙන් කියනු ඇත.

وَلَوْ نَزَّلْنَا عَلَيْكَ كِتَابًا فِي قِرْطَاسٍ فَلَمَسُوهُ بِأَيْدِيهِمْ لَقَالَ الَّذِينَ كَفَرُوا إِنْ هَٰذَا إِلَّا سِحْرٌ مُّبِينٌ ٨

9. තවද 'ඔහු වෙත එක් සුරදූතයකු පහළ කරනු නොලැබුවේ ඇයි දැ'යි ඔවුහු විමසති?. අපි එක් සුරදූතයෙකු එව්වෙමු නම්, මෙම ගැටළුව නිරාකරණය වන්නට තිබුණි. (පසුව) ඔවුනට කිසිඳු අවකාශයක් දෙනු නොලබන්නේය.

وَقَالُوا لَوْلَا أُنزِلَ عَلَيْهِ مَلَكٌ ۖ وَلَوْ أَنزَلْنَا مَلَكًا لَّقُضِيَ الْأَمْرُ ثُمَّ لَا يُنظَرُونَ ٩

10. අපි එක් සුරදූතයෙකු (වක්තෘවරයෙකු ලෙස) පත් කළේ නම්, අපි ඔහුව මිනිසෙකු ලෙස (පෙනෙන්නට) සලස්වන්නෙමු. තවද මේ ආකාරයට ඔවුන් (තමන්වම) ව්‍යාකුලත්වයට පත්වූ දැයින්ම අපි ඔවුන්ව ව්‍යාකුලත්වයට පත්කරන්නෙමු.

وَلَوْ جَعَلْنَاهُ مَلَكًا لَّجَعَلْنَاهُ رَجُلًا وَلَلَبَسْنَا عَلَيْهِم مَّا يَلْبِسُونَ ١٠

11. ඔබට පෙර වූ දූතයන්ද සරදම් කරනු ලැබූහ. එහෙත් ඔවුන් කුමන දේ ගැන සරදම් කළේද, ඒ දේම සරදම් කරන්නන්ව වෙළා ගත්තේය.

وَلَقَدِ اسْتُهْزِئَ بِرُسُلٍ مِّن قَبْلِكَ فَحَاقَ بِالَّذِينَ سَخِرُوا مِنْهُم مَّا كَانُوا بِهِ يَسْتَهْزِئُونَ ١١ ع

12. 'නුඹලා පොළොවෙහි සැරිසරා, (වක්තෘවරුන්ව) බොරු කළ අයගේ අවසානය කෙසේවීදැයි බලනු'යි පවසන්න.

قُلْ سِيرُوا فِي الْأَرْضِ ثُمَّ انظُرُوا كَيْفَ كَانَ عَاقِبَةُ الْمُكَذِّبِينَ ١٢

قُلْ لِّمَنْ مَّا فِي السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ قُلْ لِّلّٰهِ ؕ كَتَبَ عَلٰى نَفْسِهِ الرَّحْمَةَ ؕ لَيَجْمَعَنَّكُمْ اِلٰى يَوْمِ الْقِيٰمَةِ لَا رَيْبَ فِيْهِ ؕ اَلَّذِيْنَ خَسِرُوْۤا اَنْفُسَهُمْ فَهُمْ لَا يُؤْمِنُوْنَ ﴿١٣﴾

13. 'අහස්හි සහ පොළොවෙහි ඇති දේ කා හට අයත්දැ'යි අසන්න. 'අල්ලාහ්ට යැයි' පවසන්න. දයාව (දැක්වීම) තමන්ටම ඔහු අනිවාර්ය කරගත්තේය. ඔහු නුඹලාව පුනරුත්ථාන දිනය තෙක් එක් රැස් කරමින් සිටින්නේය. මෙහි කිසිඳු සැකයක් නැත. සිය ආත්මයන් හානි කරන අය විශ්වාස නොකරන්නෝය.

وَلَهٗ مَا سَكَنَ فِي الَّيْلِ وَالنَّهَارِ ؕ وَهُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿١٤﴾

14. රාත්‍රියෙහි මෙන්ම දවාල යෙහි වෙසෙන සියළු දේ ඔහු සතුය. එමෙන්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

قُلْ اَغَيْرَ اللّٰهِ اَتَّخِذُ وَلِيًّا فَاطِرِ السَّمٰوٰتِ وَالْاَرْضِ وَهُوَ يُطْعِمُ وَلَا يُطْعَمُ ؕ قُلْ اِنِّيْۤ اُمِرْتُ اَنْ اَكُوْنَ اَوَّلَ مَنْ اَسْلَمَ وَلَا تَكُوْنَنَّ مِنَ الْمُشْرِكِيْنَ ﴿١٥﴾

15. පවසන්න, 'අහස් හා පොළොවෙහි මැවුම්කරුවාණන් වන අල්ලාහ් හැර වෙනත් ආරක්ෂකයෙකුව මා ගන්නේද? ඔහු ආහාර සපයන්නේය, (ඔහුට) ආහාර සපයනු නොලබන්නේය.' 'අවනත වන්නන්ගෙන් ප්‍රථමයා වීමට මා හට අණකරන ලද්දැ'යි පවසන්න! තවද ඔබ (අල්ලාහ්ට) සමානයන් තබන්නන්ගෙන් කෙනෙකු නොවන්න.

قُلْ اِنِّيْۤ اَخَافُ اِنْ عَصَيْتُ رَبِّيْ عَذَابَ يَوْمٍ عَظِيْمٍ ﴿١٦﴾

16. ඔබ පවසන්න, 'මාගේ අධිපතියාණන්ට මා අකීකරු වන්නේ නම්, මහත් දිනයෙහි දඬුවම කෙරෙහි ඇත්තෙන්ම මා බිය වෙමි'.

مَنْ يُّصْرَفْ عَنْهُ يَوْمَئِذٍ فَقَدْ رَحِمَهٗ ؕ وَذٰلِكَ الْفَوْزُ الْمُبِيْنُ ﴿١٧﴾

17. කවරෙකුට හෝ එම දිනයෙහි එය ඉවත් කරනු ලැබුවේ නම් ඔහුට ඇත්තෙන්ම අල්ලාහ් දයාව දැක්වුයේය. තවද මෙය ඇත්තෙන්ම ප්‍රත්‍යක්ෂ ජයග්‍රහණයකි.

وَاِنْ يَّمْسَسْكَ اللّٰهُ بِضُرٍّ فَلَا كَاشِفَ لَهٗۤ اِلَّا هُوَ ؕ وَاِنْ يَّمْسَسْكَ بِخَيْرٍ فَهُوَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿١٨﴾

18. තවද අල්ලාහ් ඔබට කිසියම් විපතක් ගෙනදුනහොත් එය ඉවත් කිරීමට ඔහු හැර අන් කිසිවෙකු නොමැත. ඔහු ඔබට කිසියම් යහපතක් ගෙන දුනහොත්, එවිට ඔහු අභිමත සියළු දේ කිරීමට ඔහු බලසම්පන්න වන්නේය.

وَهُوَ الْقَاهِرُ فَوْقَ عِبَادِهِ ۚ وَهُوَ الْحَكِيمُ الْخَبِيرُ ﴿١٩﴾

19. ඔහු තම මැවීම් වන මනුෂ්‍ය වර්ගයා කෙරෙහි සර්වබලධාරිය. එමෙන්ම ඔහු ප්‍රඥා සම්පන්නය, සියල්ලෙහිම විමසිලිමත්ය.

قُلْ أَيُّ شَيْءٍ أَكْبَرُ شَهَادَةً ۖ قُلِ اللَّهُ ۖ شَهِيدٌ بَيْنِي وَبَيْنَكُمْ ۚ وَأُوحِيَ إِلَيَّ هَٰذَا الْقُرْآنُ لِأُنذِرَكُم بِهِ وَمَن بَلَغَ ۚ أَئِنَّكُمْ لَتَشْهَدُونَ أَنَّ مَعَ اللَّهِ آلِهَةً أُخْرَىٰ ۚ قُل لَّا أَشْهَدُ ۚ قُلْ إِنَّمَا هُوَ إِلَٰهٌ وَاحِدٌ وَإِنَّنِي بَرِيءٌ مِّمَّا تُشْرِكُونَ ﴿٢٠﴾

20. 'සාක්ෂියක් වශයෙන් කුමන දේ අති බලවත්දැ?'යි අසන්න. 'නුඹලාත් මාත් අතර අල්ලාහ් සාක්ෂිකරුවෙකු වේ. තවද මෙම කුර්ආනය මෙමගින් නුඹලාටත්, මෙය ලබන අයටත් මා අවවාද කිරීම පිණිස මාවෙත අනාවරණය කොට ඇත. කිමද! අල්ලාහ් හැරෙන්නට තවත් දෙවිවරුන් සිටින බව ඇත්තෙන්ම නුඹලා සාක්ෂි දරන්නෙහුදැ?' යි පවසන්න. 'මම (මෙයට) සාක්ෂි නොදරන්නෙමි'යි පවසන්න. 'එකම දෙවියා ඔහුය, නුඹලා (ඔහුට) සමාන තබන දැයින් මම මුලුමනින්ම ගැලවී සිටිමි'යි පවසන්න.

الَّذِينَ آتَيْنَاهُمُ الْكِتَابَ يَعْرِفُونَهُ كَمَا يَعْرِفُونَ أَبْنَاءَهُمُ ۘ الَّذِينَ خَسِرُوا أَنفُسَهُمْ فَهُمْ لَا يُؤْمِنُونَ ﴿٢١﴾

21. අප පුස්තකය දුන් අය තමන්ගේ පුතුන් හඳුනාගන්නා සේ ඔහුව හඳුනා ගනිති. සිය ආත්මයන් හානි කරගත් අය විශ්වාස නොකරන්නෝය.

وَمَنْ أَظْلَمُ مِمَّنِ افْتَرَىٰ عَلَى اللَّهِ كَذِبًا أَوْ كَذَّبَ بِآيَاتِهِ ۗ إِنَّهُ لَا يُفْلِحُ الظَّالِمُونَ ﴿٢٢﴾

22. අල්ලාහ්ට විරුද්ධව බොරු ගොතන්නාට හෝ ඔහුගේ සළකුණු බොරු කරන්නාට වඩා අදම්ටුවා කවරෙක්ද? සැබැවින්ම අදම්ටුවන් ජය නොගන්නෝය.

وَيَوْمَ نَحْشُرُهُمْ جَمِيعًا ثُمَّ نَقُولُ لِلَّذِينَ أَشْرَكُوا أَيْنَ شُرَكَاؤُكُمُ الَّذِينَ كُنتُمْ تَزْعُمُونَ ﴿٢٣﴾

23. තවද අප ඔවුන් සියල්ලන්වම එක් රැස් කරන්නාවූ එම දිනය ගැන (සිහිපත්) කරනු. පසුව 'නුඹලා ස්ථිර ලෙස ප්‍රකාශ කළ නුඹලාගේ සමානයන් කොහිදැ?'යි අපි (අල්ලාහ්ට) සමානයන් තැබූවන්ගෙන් විමසන්නෙමු.

ثُمَّ لَمْ تَكُن فِتْنَتُهُمْ إِلَّا أَن قَالُوا وَاللَّهِ

24. පසුව, 'අපගේ අධිපතියාණන්

رَبِّنَا مَا كُنَّا مُشْرِكِينَ ﴿٢٤﴾

වන අල්ලාහ් මත දිවුරා, අපි සමාන තබන්නන් ලෙස නොවූයෙමු'යි කියනු හැරෙන්නට ඔවුන්ගේ කලහකාරී කමෙහි කිසිවක් ඉතුරු නොවන්නේය.

اُنْظُرْ كَيْفَ كَذَبُوا عَلَىٰٓ اَنْفُسِهِمْ وَضَلَّ عَنْهُمْ مَّا كَانُوا يَفْتَرُونَ ﴿٢٥﴾

25. ඔවුන් තමන්ට විරුද්ධව මුසාබස් කෙලෙස පවසන්නේ දැයි ද, ඔවුන් බොරු ගෙතූ දේ ඔවුනට පලක් අත් නොවන්නේ දැයි ද බලන්න.

وَمِنْهُمْ مَّنْ يَّسْتَمِعُ اِلَيْكَ ۚ وَجَعَلْنَا عَلٰى قُلُوْبِهِمْ اَكِنَّةً اَنْ يَّفْقَهُوْهُ وَفِيْٓ اٰذَانِهِمْ وَقْرًا ۗ وَاِنْ يَّرَوْا كُلَّ اٰيَةٍ لَّا يُؤْمِنُوْا بِهَا ۗ حَتّٰٓى اِذَا جَآءُوْكَ يُجَادِلُوْنَكَ يَقُوْلُ الَّذِيْنَ كَفَرُوْٓا اِنْ هٰذَآ اِلَّآ اَسَاطِيْرُ الْاَوَّلِيْنَ ﴿٢٦﴾

26. තවද ඔබට සවන් දෙන සමහරෙක් ඔවුන් අතර වෙති. එහෙත් ඔවුන් එය වටහා ගත නොහැකි ආකාරයට අපි ඔවුන්ගේ හදවත් මත තිරයන්ද, ඔවුන්ගේ කන්හි බිහිරි භාවයද ඇති කළෙමු. තවද ඔවුන් සෑම සළකුණක්ම දැකගත් නමුත් ඔවුහු ඒවා විශ්වාස නොකරන්නෝය. ඔවුන් කොපමණතාක් ඔබ වෙත පැමිණියද, ඔබ සමඟ තර්ක කරති. 'මෙය අන් කිසිවක් නොව පැරැන්නන්ගේ කතන්දර යැ'යි අවිශ්වාස කරන අය කියති.

وَهُمْ يَنْهَوْنَ عَنْهُ وَيَنْـَٔوْنَ عَنْهُ ۚ وَاِنْ يُّهْلِكُوْنَ اِلَّآ اَنْفُسَهُمْ وَمَا يَشْعُرُوْنَ ﴿٢٧﴾

27. තවද ඔවුහු එය (විශ්වාස කිරීමෙන් අන් අයව) වළක්වති. ඔවුන් ද එයින් ඈත් වෙති. තවද ඔවුන් හානි ඇති කරගනු ලබන්නේ අන් කිසිවෙකුට නොව තමන්ටමය. එහෙත් ඔවුහු එය වටහා නොගනිති.

وَلَوْ تَرٰٓى اِذْ وُقِفُوْا عَلَى النَّارِ فَقَالُوْا يٰلَيْتَنَا نُرَدُّ وَلَا نُكَذِّبَ بِاٰيٰتِ رَبِّنَا وَنَكُوْنَ مِنَ الْمُؤْمِنِيْنَ ﴿٢٨﴾

28. නිරාගින්න අසලින් ඔවුන්ව සිටීමට සලස්වනු ලැබූ කල්හි ඔබ දුටුවහොත්, ඔවුහු 'අහෝ අපි ආපසු යවනු ලබන්නේ නම්! අපි අපගේ අධිපතියාණන්ගේ සළකුණු බොරු යැයි නොසලකන්නෙමු. එමෙන්ම අපි විශ්වාසිතයින්ගෙන් වන්නෙමු'යි කියන්නෝය.

بَلْ بَدَا لَهُمْ مَّا كَانُوْا يُخْفُوْنَ مِنْ قَبْلُ ۗ وَلَوْ رُدُّوْا لَعَادُوْا لِمَا نُهُوْا عَنْهُ وَاِنَّهُمْ

29. එසේනොව ඔවුන් කලින් සඟවා තැබූ දේ (දැන්) ඔවුන්ට පැහැදිලි වී තිබේ. ඔවුන් ආපසු එවනු ලැබුවද තහනම් කරනු ලැබූ දේ වෙත සත්තකින්ම යන්නෝමය.

لَكٰذِبُوْنَ ۝٢٩

සැබැවින්ම ඔවුන් මුසාවාදීන් වන්නෝය.

وَقَالُوْۤا اِنْ هِىَ اِلَّا حَيَاتُنَا الدُّنْيَا وَمَا نَحْنُ بِمَبْعُوْثِيْنَ ۝٣٠

30. තවද 'අපගේ මෙලොව ජීවිතය හැරෙන්නට වෙනත් දෙයක් නොමැත. තවද අපි නැවත නැගිටිනු නොලබන්නෙමු'යි ඔවුහු කියති.

وَلَوْ تَرٰۤى اِذْ وُقِفُوْا عَلٰى رَبِّهِمْ ؕ قَالَ اَلَيْسَ هٰذَا بِالْحَقِّ ؕ قَالُوْا بَلٰى وَرَبِّنَا ؕ قَالَ فَذُوْقُوا الْعَذَابَ بِمَا كُنْتُمْ تَكْفُرُوْنَ ۝٣١ ع

31. තවද ඔවුන් තමන්ගේ අධිපතියාණන් ඉදිරියෙහි සිටීමට සලස්වනු ලැබූ කල්හි ඔබ දුටුවහොත්, ඔහු, 'මෙය (එලොව ජීවිතය) සත්‍යය නොවේද'යි අසන්නේය. (එවිට) ඔවුහු, 'එසේය, අප අධිපතියාණන් මත සාක්කි'යි කියන්නෝය. 'එසේනම් නුඹලා ප්‍රතික්ෂේප කළ හෙයින් (මෙම) දඬුවම විඳින්නැ'යි ඔහු පවසන්නේය.

قَدْ خَسِرَ الَّذِيْنَ كَذَّبُوْا بِلِقَآءِ اللّٰهِ ؕ حَتّٰۤى اِذَا جَآءَتْهُمُ السَّاعَةُ بَغْتَةً قَالُوْا يٰحَسْرَتَنَا عَلٰى مَا فَرَّطْنَا فِيْهَا ۙ وَهُمْ يَحْمِلُوْنَ اَوْزَارَهُمْ عَلٰى ظُهُوْرِهِمْ ؕ اَلَا سَآءَ مَا يَزِرُوْنَ ۝٣٢

32. අල්ලාහ් සමග හමුවීම ගැන බොරු කරන්නෝ ඇත්ත වශයෙන්ම පාඩු ලබන්නන් වෙති. ඒ කිම්තාක්දයත් ඔවුන් වෙත එම හෝරාව නොදැනුවත්වම පැමිණි කල්හි, 'අහෝ මෙය (මොහොත) අපි නොසලකා හැරීම හේතුවෙන් මෙය අපට ඇතිවූ දුකක්යැ!'යි ඔවුහු කියන්නෝය. ඔවුහු තමන්ගේ බර තමන්ගේ පිට මත උසුලන්නෝය. ඇත්තෙන්ම ඔවුන් උසුලන දේ ඉතා නරකය.

وَمَا الْحَيٰوةُ الدُّنْيَاۤ اِلَّا لَعِبٌ وَّلَهْوٌ ؕ وَلَلدَّارُ الْاٰخِرَةُ خَيْرٌ لِّلَّذِيْنَ يَتَّقُوْنَ ؕ اَفَلَا تَعْقِلُوْنَ ۝٣٣

33. ලෞකික ජීවිතය කෙළි සෙල්ලමක් මෙන්ම විනෝදයක් හැරෙන්නට අන් කිසිවක් නොවේ. එහෙත් ධාර්මිෂ්ඨකයින්ට සැබැවින්ම පරලොවේ වාසස්ථානය වඩා යහපත්වේ. එබැවින් නුඹලා වටහා නොගන්නේ මන්ද?

قَدْ نَعْلَمُ اِنَّهٗ لَيَحْزُنُكَ الَّذِىْ يَقُوْلُوْنَ فَاِنَّهُمْ لَا يُكَذِّبُوْنَكَ وَلٰكِنَّ الظّٰلِمِيْنَ بِاٰيٰتِ اللّٰهِ يَجْحَدُوْنَ ۝٣٤

34. ඔවුන් පවසන දේ ඔබව ඇත්තෙන්ම කනස්සල්ලට පත් කරන්නක් බව අපි (මැනැවින්) දනිමු. කිම්දයත් ඔවුන් ඔබව බොරුකරන්නෙකු බවට චෝදනා කරන්නේ නැත. එනමුත් දුෂ්ඨයින් අල්ලාහ්ගේ සළකුණු ඕනෑකමින් ප්‍රතික්ෂේප කරති.

35. ඇත්තෙන්ම ඔබට පෙරද දූතයින් ප්‍රතික්ෂේප කරනු ලැබූහ. එහෙත් ඔවුන්ව ප්‍රතික්ෂේප කරනු ලැබුවදීත් වද හිංසාවට පත් කරනු ලැබුවදීත් අපගේ උපකාරය පැමිණෙනතාක් ඔවුහු ඉවසිල්ලෙන් සිටියහ. අල්ලාහ්ගේ වදන් වෙනස් කළ හැකි කිසිවෙකුත් නොමැත. තවද (පෙර සිටි) දූතයන්ගේ ආරංචි ඇත්තෙන්ම ඔබ වෙත පැමිණ ඇත.

وَلَقَدْ كُذِّبَتْ رُسُلٌ مِّن قَبْلِكَ فَصَبَرُوا عَلَىٰ مَا كُذِّبُوا وَأُوذُوا حَتَّىٰ أَتَاهُمْ نَصْرُنَا ۚ وَلَا مُبَدِّلَ لِكَلِمَاتِ اللَّهِ ۚ وَلَقَدْ جَاءَكَ مِن نَّبَإِ الْمُرْسَلِينَ ﴿٣٥﴾

36. තවද ඔවුන්ගේ පිටුදැකීම ඔබට දරුණු දෙයක් නම්, ඔබට හැකි නම්, පොළොව කරා උමගක් හෝ අහස කරා ඉණිමගක් හෝ සොයා, සලකුණක් ඔවුන් වෙත රැගෙන එන්න. (ඔබට එසේ කළ නොහැකිය) තවද අල්ලාහ්, ඔහුගේ අභිමතය (ක්‍රියාත්මක) කළේ නම් ඔවුන්ව යහ මාර්ගයේ නිසැකවම එක්රැස් කිරීමට ඔහුට හැකිවන්නේමය. එබැවින් ඔබ අඥානයන්ගෙන් (කෙනෙකු) නොවන්න.

وَإِن كَانَ كَبُرَ عَلَيْكَ إِعْرَاضُهُمْ فَإِنِ اسْتَطَعْتَ أَن تَبْتَغِيَ نَفَقًا فِي الْأَرْضِ أَوْ سُلَّمًا فِي السَّمَاءِ فَتَأْتِيَهُم بِآيَةٍ ۚ وَلَوْ شَاءَ اللَّهُ لَجَمَعَهُمْ عَلَى الْهُدَىٰ ۚ فَلَا تَكُونَنَّ مِنَ الْجَاهِلِينَ ﴿٣٦﴾

37. අවංකව සවන් දෙන්නෝ පමණක් ප්‍රතිචාර දක්වති. තවද මළවුන්ව අල්ලාහ් නැගිටුවන්නේමය. පසුව ඔවුහු ඔහු වෙතම ආපසු ගෙන එනු ලබන්නෝය.

إِنَّمَا يَسْتَجِيبُ الَّذِينَ يَسْمَعُونَ ۘ وَالْمَوْتَىٰ يَبْعَثُهُمُ اللَّهُ ثُمَّ إِلَيْهِ يُرْجَعُونَ ﴿٣٧﴾

38. තවද ඔවුහු 'ඔහුගේ අධිපතියාණන්ගෙන් ඔහුට කිසියම් සළකුණක් පහළ නොකරනු ලැබුවේ කුමක් හෙයින්දැ?'යි කියති. පවසන්න! 'අල්ලාහ් සළකුණක් පහළ කිරීමට ඇත්තෙන්ම බලසම්පන්නය. එනමුත් ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් නොදන්නෝය.'

وَقَالُوا لَوْلَا نُزِّلَ عَلَيْهِ آيَةٌ مِّن رَّبِّهِ ۚ قُلْ إِنَّ اللَّهَ قَادِرٌ عَلَىٰ أَن يُنَزِّلَ آيَةً وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿٣٨﴾

39. පොළොවෙහි (සැරිසරන) සතෙකු වුවද, පියාපත් දෙකින් පියාඹන පක්ෂියෙකු වුවද නුඹලා වැනි සමූහයන් මිස නැත. අප (මෙම) ග්‍රන්ථයෙහි කිසිවක් අත්හැර නොමැත. පසුව ඔවුහු තමන්ගේ

وَمَا مِن دَابَّةٍ فِي الْأَرْضِ وَلَا طَائِرٍ يَطِيرُ بِجَنَاحَيْهِ إِلَّا أُمَمٌ أَمْثَالُكُم ۚ مَّا فَرَّطْنَا فِي الْكِتَابِ مِن

අධිපතියාණන් වෙත එක්රැස් කරනු ලබන්නෝය.

شَيْءٍ ثُمَّ إِلَىٰ رَبِّهِمْ يُحْشَرُونَ ﴿٣٩﴾

40. එමෙන්ම අපගේ සලකුණු ප්‍රතික්ෂේප කර ඇත්තන් අන්ධකාරයන්හි සිටින බිහිරන් ද ගොළුවන් ද වෙති. අල්ලාහ් යමෙකුව අභිමත කරන්නේද, ඒ තැනැත්තාව නොමඟ යැමට ඔහු සලස්වන්නේය. එමෙන්ම ඔහු යමෙකුව නිශ්චය කරන්නේද ඒ තැනැත්තාව යහමගට ඔහු යොමු කරන්නේය.

وَالَّذِينَ كَذَّبُوا بِآيَاتِنَا صُمٌّ وَبُكْمٌ فِي الظُّلُمَاتِ ۗ مَنْ يَشَإِ اللَّهُ يُضْلِلْهُ ۗ وَمَنْ يَشَأْ يَجْعَلْهُ عَلَىٰ صِرَاطٍ مُسْتَقِيمٍ ﴿٤٠﴾

41. පවසන්න! 'නුඹලා වෙත අල්ලාහ්ගේ දඬුවම පැමිණි විට හෝ (නිශ්චිත) මොහොත නුඹලා වෙත පැමිණි විට හෝ (නුඹලාගේ ප්‍රතිචාරය ගැන) නුඹලා කුමක් සිතන්නේද? නුඹලා සත්‍යවාදීන් නම්, අල්ලාහ් හැර අන් කිසිවෙකුව නුඹලා කැඳවන්නෙහුද?'

قُلْ أَرَأَيْتَكُمْ إِنْ أَتَاكُمْ عَذَابُ اللَّهِ أَوْ أَتَتْكُمُ السَّاعَةُ أَغَيْرَ اللَّهِ تَدْعُونَ إِنْ كُنْتُمْ صَادِقِينَ ﴿٤١﴾

42. එසේ නොවේ. නුඹලා ඔහුවම කැඳවන්නෝය. පසුව ඔහු කැමති වුවහොත්, නුඹලා කුමක් (ඉවත්කර ගැනීම) සඳහා ඔහුව කැඳවන්නේද, ඔහු එය ඉවත් කරන්නේමය. තවද නුඹලා (ඔහුට) සමාන තබන දෑ නුඹලා අමතක කරන්නෝය.

بَلْ إِيَّاهُ تَدْعُونَ فَيَكْشِفُ مَا تَدْعُونَ إِلَيْهِ إِنْ شَاءَ وَتَنْسَوْنَ مَا تُشْرِكُونَ ﴿٤٢﴾ ع

43. ඇත්තෙන්ම අපි ඔබට කලින් වූ ජන සමූහයන් හට (දූතයින්) එව්වෙමු. අනතුරුව ඔවුන් අවනතභාවය දැක්වීම පිණිස දිළිඳුකම හා විපතින් අපි ඔවුන්ව හසු කර ගත්තෙමු.

وَلَقَدْ أَرْسَلْنَا إِلَىٰ أُمَمٍ مِنْ قَبْلِكَ فَأَخَذْنَاهُمْ بِالْبَأْسَاءِ وَالضَّرَّاءِ لَعَلَّهُمْ يَتَضَرَّعُونَ ﴿٤٣﴾

44. එසේ නම් අපගේ දඬුවම ඔවුන් වෙත පැමිණි විට ඔවුන් අවනතභාවය නොදැක්වූයේ මන්ද? එහෙත් ඔවුන්ගේ හදවත් දැඩි බවට පත්විය. එමෙන්ම ඔවුන් කළ දේ ෂෙයිතාන් ඔවුනට අලංකාරව (පෙනෙන්නට) සැලැස්වීය.

فَلَوْلَا إِذْ جَاءَهُمْ بَأْسُنَا تَضَرَّعُوا وَلَٰكِنْ قَسَتْ قُلُوبُهُمْ وَزَيَّنَ لَهُمُ الشَّيْطَانُ مَا كَانُوا يَعْمَلُونَ ﴿٤٤﴾

45. පසුව ඔවුනට දැනමුතුකම්

فَلَمَّا نَسُوا مَا ذُكِّرُوا بِهِ فَتَحْنَا عَلَيْهِمْ

اَبْوَابَ كُلِّ شَيْءٍ ؕ حَتّٰۤى اِذَا فَرِحُوْا بِمَاۤ اُوْتُوْۤا اَخَذْنٰهُمْ بَغْتَةً فَاِذَا هُمْ مُّبْلِسُوْنَ ﴿٤٥﴾

කරනු ලැබූ දේ ඔවුන් අමතක කළ විටදී සියලු දෑයෙහි දොරටු අපි ඔවුන් වෙනුවෙන් විවෘත කළෙමු. යම් තාක් ඔවුනට ලබා දුන් දෑයින් ඔවුන් ප්‍රීතියෙන් උඩඟු වූ විටදී, සැණින් අපි ඔවුන්ව ග්‍රහණය කර ගත්තෙමු. එතෙක්! ඔවුහු අනපේක්ෂිතව සිටියහ.

فَقُطِعَ دَابِرُ الْقَوْمِ الَّذِيْنَ ظَلَمُوْا ؕ وَالْحَمْدُ لِلّٰهِ رَبِّ الْعٰلَمِيْنَ ﴿٤٦﴾

46. එබැවින් වැරදි කළ ජනයාගේ මුදුන්මුල කපා හරින ලදී. තවද සියළු ප්‍රශංසා සර්ව ලෝකයන්ටම අධිපතියාණන් වූ අල්ලාහ්ට හිමිය.

قُلْ اَرَءَيْتُمْ اِنْ اَخَذَ اللّٰهُ سَمْعَكُمْ وَاَبْصَارَكُمْ وَخَتَمَ عَلٰى قُلُوْبِكُمْ مَّنْ اِلٰهٌ غَيْرُ اللّٰهِ يَاْتِيْكُمْ بِهٖ ؕ اُنْظُرْ كَيْفَ نُصَرِّفُ الْاٰيٰتِ ثُمَّ هُمْ يَصْدِفُوْنَ ﴿٤٧﴾

47. 'අල්ලාහ් නුඹලාගේ ශ්‍රවණයද, නුඹලාගේ දෘෂ්‍යයද ඉවත්කර නුඹලාගේ හදවත් මත මුද්‍රා තැබුවහොත්, අල්ලාහ් හැර ඒවා නුඹලා වෙත (ආපසු) ගෙන දෙන දෙවියා කවුරුද? යන්න නුඹලා සිතාබැලුවේද,'යි අසන්න. අපි සලකුණු කුමන අන්දමින් විවිධාකාරව ගෙනහැර දක්වන්නෙමුදැයි බලනු. එසේ වුවද ඔවුහු පිටුපාන්නෝය.

قُلْ اَرَءَيْتَكُمْ اِنْ اَتٰىكُمْ عَذَابُ اللّٰهِ بَغْتَةً اَوْ جَهْرَةً هَلْ يُهْلَكُ اِلَّا الْقَوْمُ الظّٰلِمُوْنَ ﴿٤٨﴾

48. 'අල්ලාහ්ගේ දඬුවම සැණින් හෝ විවෘතව නුඹලා වෙත පැමිණියහොත්, වැරදිකරන්නන්ව හැර කවරෙකු හෝ විනාශ කරනු ලැබුවේද යන්න නුඹලා සිතා බැලුවේද,'යි අසන්න.

وَمَا نُرْسِلُ الْمُرْسَلِيْنَ اِلَّا مُبَشِّرِيْنَ وَمُنْذِرِيْنَ ۚ فَمَنْ اٰمَنَ وَاَصْلَحَ فَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُوْنَ ﴿٤٩﴾

49. තවද ශුභාරංචි ගෙනෙන්නන් ලෙසත් අවවාදකරුවන් ලෙසත් මිස අපි දූතයන් නොඑව්වෙමු. එබැවින් විශ්වාස කරමින් (තමන්වම) නිවැරදි කර ගන්නන් හට කිසිඳු බියක් (පැමිණෙන්නේ)ද නැත, ඔවුන් ශෝක වන්නේද නැත.

وَالَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِنَا يَمَسُّهُمُ الْعَذَابُ بِمَا كَانُوْا يَفْسُقُوْنَ ﴿٥٠﴾

50. එමෙන්ම කවුරුන් හෝ අපගේ සලකුණු ප්‍රතික්ෂේප කරන්නේද ඔවුන් අකීකරු වූ හෙයින් දඬුවම ඔවුනට අත් වනු ඇත.

51. 'අල්ලාහ්ගේ වස්තූන් මා සතුව තිබෙන බව මම නුඹලාට නොකියමි. ගුප්ත දේ මා දන්නා බවත් මා සුරදූතයෙකු බවත් මම නුඹලාට නොකියමි. මා වෙත අනාවරණය කරන ලද දේ පමණක් මම අනුගමනය කරමි'යි පවසන්න. 'අන්ධයෙකු හා ඇස් පෙනෙන්නෙකු එක සමාන වන්නේද? එවිටත් නුඹලා මෙනෙහි නොකරන්නේ මන්ද,'යි පවසන්න.

قُل لَّآ أَقُولُ لَكُمْ عِندِى خَزَآئِنُ ٱللَّهِ وَلَآ أَعْلَمُ ٱلْغَيْبَ وَلَآ أَقُولُ لَكُمْ إِنِّى مَلَكٌ ۖ إِنْ أَتَّبِعُ إِلَّا مَا يُوحَىٰٓ إِلَىَّ ۚ قُلْ هَلْ يَسْتَوِى ٱلْأَعْمَىٰ وَٱلْبَصِيرُ ۚ أَفَلَا تَتَفَكَّرُونَ ﴿٥١﴾

52. තවද තම අධිපතියාණන් වෙත තමන් එක් රැස් කරනු ලබන්නේ යැයිද ඔහු හැරෙන්නට (යම්) මිතුරෙකු හෝ මැදිහත් වන්නෙකු නැත යැයිද බියට පත් වන්නන් දේවභක්තිකයින් වනු පිණිස මෙමගින් ඔවුනට අවවාද කරන්න.

وَأَنذِرْ بِهِ ٱلَّذِينَ يَخَافُونَ أَن يُحْشَرُوٓا۟ إِلَىٰ رَبِّهِمْ ۙ لَيْسَ لَهُم مِّن دُونِهِۦ وَلِىٌّ وَلَا شَفِيعٌ لَّعَلَّهُمْ يَتَّقُونَ ﴿٥٢﴾

53. එමෙන්ම තම අධිපතියාණන්ට, ඔහුගේ තෘප්තිය තකා උදේ සවස යදින අයව පළවා නොහරින්න. ඔවුන්ගේ ඉපැයුමෙහි ඔබ වෙත කිසි සේත් වගකීමක් නැත. (එසේම) ඔබගේ ඉපැයුමෙහි ඔවුන් වෙතද කිසි සේත් වගකීමක් නැත. එවිටත් ඔබ ඔවුන්ව පලවා හරින්නේ නම්, ඔබ අදමිටුවන් හා එක් වන්නේය.

وَلَا تَطْرُدِ ٱلَّذِينَ يَدْعُونَ رَبَّهُم بِٱلْغَدَوٰةِ وَٱلْعَشِىِّ يُرِيدُونَ وَجْهَهُۥ ۖ مَا عَلَيْكَ مِنْ حِسَابِهِم مِّن شَىْءٍ وَمَا مِنْ حِسَابِكَ عَلَيْهِم مِّن شَىْءٍ فَتَطْرُدَهُمْ فَتَكُونَ مِنَ ٱلظَّٰلِمِينَ ﴿٥٣﴾

54. තවද මෙයාකාරයට, 'අප අතුරෙන් අල්ලාහ් අනුග්‍රහය දක්වා ඇත්තේ මෙවන් අයටද?' යන්න ඔවුන් පවසන තුරු ඔවුන්ගෙන් ඇතැමුන්ව ඇතැම් අය ලවා අපි පරීක්ෂා කළෙමු. අල්ලාහ් කෘතඥතා දක්වන්නන්ව මැනැවින් දැනුවත් නොවේද?

وَكَذَٰلِكَ فَتَنَّا بَعْضَهُم بِبَعْضٍ لِّيَقُولُوٓا۟ أَهَٰٓؤُلَآءِ مَنَّ ٱللَّهُ عَلَيْهِم مِّنۢ بَيْنِنَآ ۗ أَلَيْسَ ٱللَّهُ بِأَعْلَمَ بِٱلشَّٰكِرِينَ ﴿٥٤﴾

55. තවද අපගේ සළකුණු කෙරෙහි විශ්වාස කරන්නන් ඔබ වෙත පැමිණි විට, පවසන්න, 'නුඹලාට සාමය අත් වේවා! නුඹලාගේ අධිපතියාණන් දයාව (දැක්වීම) තමා කෙරෙහිම පවරාගෙන ඇත. එබැවින් නුඹලා අතුරෙහි කිසිවෙකු හෝ

وَإِذَا جَآءَكَ ٱلَّذِينَ يُؤْمِنُونَ بِـَٔايَٰتِنَا فَقُلْ سَلَٰمٌ عَلَيْكُمْ ۖ كَتَبَ رَبُّكُمْ عَلَىٰ نَفْسِهِ ٱلرَّحْمَةَ ۖ أَنَّهُۥ مَنْ عَمِلَ مِنكُمْ سُوٓءًۢا

بِجَهَالَةٍ ثُمَّ تَابَ مِنْۢ بَعْدِهٖ وَاَصْلَحَ فَاَنَّهٗ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٥٥﴾

නොදැනුවත්ව පාප ක්‍රියාවක් සිදු කොට පසුව පශ්චාත්තාපවී නිවැරදි කර ගත්තේ නම්, ඇත්තෙන්ම ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය'.

وَكَذٰلِكَ نُفَصِّلُ الْاٰيٰتِ وَلِتَسْتَبِيْنَ سَبِيْلُ الْمُجْرِمِيْنَ ﴿٥٦﴾ ع

56. තවද මෙයාකාරයට, (නුඹලා ක්ෂමාව අයැදිනු පිණිසත්) පව් කරන්නන්ගේ මාර්ගය ඉතා ප්‍රත්‍යක්ෂ වනු පිණිස(ත්) අපි සළකුණු විවෘතව විස්තර කර දක්වන්නෙමු.

قُلْ اِنِّيْ نُهِيْتُ اَنْ اَعْبُدَ الَّذِيْنَ تَدْعُوْنَ مِنْ دُوْنِ اللّٰهِ ؕ قُلْ لَّاۤ اَتَّبِعُ اَهْوَآءَكُمْ ۙ قَدْ ضَلَلْتُ اِذًا وَّمَاۤ اَنَا مِنَ الْمُهْتَدِيْنَ ﴿٥٧﴾

57. පවසන්න, 'අල්ලාහ් හැර නුඹලා කැඳවන දේ නැමදුම් කිරීමට මා හට තහනම් කරන ලදි'. පවසන්න! 'මම නුඹලාගේ (පහත්) ආශාවන් අනුගමනය නොකරන්නෙමි. එසේ වුවහොත් මා නොමග යන්නෙමි, තවද මා යහමග ගියවුන්ගෙන් නොවන්නෙමි'.

قُلْ اِنِّيْ عَلٰى بَيِّنَةٍ مِّنْ رَّبِّيْ وَكَذَّبْتُمْ بِهٖ ؕ مَا عِنْدِيْ مَا تَسْتَعْجِلُوْنَ بِهٖ ؕ اِنِ الْحُكْمُ اِلَّا لِلّٰهِ ؕ يَقُصُّ الْحَقَّ وَهُوَ خَيْرُ الْفٰصِلِيْنَ ﴿٥٨﴾

58. පවසන්න, 'මාගේ අධිපතියාණන් වෙතින් වූ පැහැදිලි සාක්ෂිය මත (මාගේ ස්ථාවරයෙහි) මා (නියැලි) සිටිමි. තවද නුඹලා එය බොරු කරන්නෙහුය. ඉක්මනින් එය විය යුතු යැයි නුඹලා කැමති වන දේ (සඳහා බලයක්) මා වෙත නැත. තීරණය රැඳී ඇත්තේ අල්ලාහ්ට මිස වෙන කිසිවෙකුට නැත. ඔහු සත්‍යය විග්‍රහ කරයි. තවද ඔහු විනිශ්ච කරුවන්ගෙන් ශ්‍රේෂ්ඨයාය'.

قُلْ لَّوْ اَنَّ عِنْدِيْ مَا تَسْتَعْجِلُوْنَ بِهٖ لَقُضِيَ الْاَمْرُ بَيْنِيْ وَبَيْنَكُمْ ؕ وَاللّٰهُ اَعْلَمُ بِالظّٰلِمِيْنَ ﴿٥٩﴾

59. පවසන්න! 'ඉක්මනින් එය විය යුතු යැයි නුඹලා කැමති වන දේ (සඳහා බලයක්) මා වෙත තිබුණා නම්, මා හටත් නුඹලාටත් අතර වූ ප්‍රශ්ණයට තීරණයක් වීමට ඉඩ තිබුණි. අදමිටුවන් ගැන අල්ලාහ් මැනැවින් දන්නේය'.

وَعِنْدَهٗ مَفَاتِحُ الْغَيْبِ لَا يَعْلَمُهَاۤ اِلَّا هُوَ ؕ وَيَعْلَمُ مَا فِي الْبَرِّ وَالْبَحْرِ ؕ وَمَا

60. තවද අදෘශ්‍යමාන දෙයට යතුරු ඇත්තේ ඔහු වෙතය. ඔහු හැර වෙන කිසිවෙක් ඒවා නොදනී. තවද ගොඩබිමේත් මුහුදේ(ත්) ඇති සියලු දෑ ඔහු දන්නේය. ඔහු දැනුවත්ව මිස කිසිම පත්‍රයක්

تَسْقُطُ مِن وَرَقَةٍ إِلَّا يَعْلَمُهَا وَلَا حَبَّةٍ فِي ظُلُمَٰتِ ٱلْأَرْضِ وَلَا رَطْبٍ وَلَا يَابِسٍ إِلَّا فِي كِتَٰبٍ مُّبِينٍ ٦٠

නොහැළේ. පොළොවේ දැඩි අන්ධකාරයෙහි ඇති ධාන්‍යය ද තෙත් හා වියළි කිසිවක්ද පැහැදිලිව පුස්තකයෙහි (සටහන්වී) මිස නැත.

وَهُوَ ٱلَّذِى يَتَوَفَّىٰكُم بِٱلَّيْلِ وَيَعْلَمُ مَا جَرَحْتُم بِٱلنَّهَارِ ثُمَّ يَبْعَثُكُمْ فِيهِ لِيُقْضَىٰٓ أَجَلٌ مُّسَمًّى ۖ ثُمَّ إِلَيْهِ مَرْجِعُكُمْ ثُمَّ يُنَبِّئُكُم بِمَا كُنتُمْ تَعْمَلُونَ ٦١ ع

61. තවද රාත්‍රියේ (නිදන කල්හි) නුඹලාගේ ආත්මයන් අත් කර ගන්නේ ඔහුමය. තවද දවාලයේ නුඹලා කරන දේ දන්නේය. පසුව නියමිත කාල පරිච්ඡේදය සම්පූර්ණ කරවනු පිණිස ඔහු නැවතත් එහි (දවාලයේ) නුඹලාව නැගිටුවන්නේය. ඉන්පසු නුඹලා ආපසු පැමිණිය යුත්තේ ඔහු වෙතමය. පසුව නුඹලා කරමින් සිටි දේ ගැන ඔහු නුඹලාට දන්වන්නේය.

وَهُوَ ٱلْقَاهِرُ فَوْقَ عِبَادِهِۦ ۖ وَيُرْسِلُ عَلَيْكُمْ حَفَظَةً ۖ حَتَّىٰٓ إِذَا جَآءَ أَحَدَكُمُ ٱلْمَوْتُ تَوَفَّتْهُ رُسُلُنَا وَهُمْ لَا يُفَرِّطُونَ ٦٢

62. තවද ඔහු තමාගේ දාසයන් කෙරෙහි පරම මහෝත්තමයාය. ඔහු නුඹලා කෙරෙහි ආරක්ෂාකයින් (රැක බලා ගැනීමට) එවන්නේය. නුඹලාගේ කිසිවෙකුට හෝ මරණය පැමිණෙන විට, අපගේ (සුර) දූතයෝ ඔහුගේ ආත්මය අත්පත් කර ගනිති. තවද ඔවුහු අසමත් නොවෙති.

ثُمَّ رُدُّوٓا۟ إِلَى ٱللَّهِ مَوْلَىٰهُمُ ٱلْحَقِّ ۚ أَلَا لَهُ ٱلْحُكْمُ وَهُوَ أَسْرَعُ ٱلْحَٰسِبِينَ ٦٣

63. ඉන්පසු ඔවුන්ගේ සැබෑ අධිපතියාණන් වන අල්ලාහ් වෙත ඔවුන් ආපසු ගෙන එනු ලබන්නෝය. ඇත්තෙන්ම විනිශ්චය ඔහු සතුය. එමෙන්ම ඔහු ගණන් බැලීමෙහිලා ඉතා සීඝ්‍රය.

قُلْ مَن يُنَجِّيكُم مِّن ظُلُمَٰتِ ٱلْبَرِّ وَٱلْبَحْرِ تَدْعُونَهُۥ تَضَرُّعًا وَخُفْيَةً ۚ لَّئِنْ أَنجَىٰنَا مِنْ هَٰذِهِۦ لَنَكُونَنَّ مِنَ ٱلشَّٰكِرِينَ ٦٤

64. “නුඹලා ගොඩබිම සහ මුහුදෙහි ඇති අන්ධකාර (විපත්)වලින් (වූ කල්හි), ‘අපව මෙයින් ඔහු මුදවා ගතහොත් ඇත්තෙන්ම අපි කෘතඥතා දක්වන්නන් වන්නෙමු’යි (පවසමින්) නිහතමානිව මෙන්ම රහසිගතවද නුඹලා ඔහුගෙන් ඉල්ලා සිටින මොහොතෙහි, (එවිට) නුඹලාව මුදවාගන්නේ කවුරුදෑ?”යි අසන්න.

65. පවසන්න, 'නුඹලාව ඒවායෙන් මෙන්ම සෑම ආපදාවකින්ම මුදවා ගන්නේ අල්ලාහ්මය. එසේ වුවද නුඹලා (ඔහුට) සමානයන් තබන්නෙහුය'.

قُلِ اللّٰهُ يُنَجِّيكُم مِّنۡهَا وَمِن كُلِّ كَرۡبٍ ثُمَّ أَنتُمۡ تُشۡرِكُونَ ﴿٦٥﴾

* 66. පවසන්න, 'නුඹලාට ඉහළින් මෙන්ම නුඹලාගේ පා යටින්ද දඬුවම් ගෙන දීමට හෝ නුඹලාව ව්‍යාකූලත්වයට පත්කර විවිධ නිකායන් වශයෙන් භේද කර, (එකිනෙකාට විරුද්ධව) ප්‍රචණ්ඩත්වය අත් විඳීමට සලස්වන්නට හෝ ඔහු බලසම්පන්නය'. ඔවුන් වටහා ගනු පිණිස සලකුණු අපි විවිධාකරව කෙසේ විස්තර කරන්නේ දැයි බලන්න!

قُلۡ هُوَ الۡقَادِرُ عَلٰٓى أَن يَبۡعَثَ عَلَيۡكُمۡ عَذَابًا مِّن فَوۡقِكُمۡ أَوۡ مِن تَحۡتِ أَرۡجُلِكُمۡ أَوۡ يَلۡبِسَكُمۡ شِيَعًا وَيُذِيقَ بَعۡضَكُم بَأۡسَ بَعۡضٍ ۗ انظُرۡ كَيۡفَ نُصَرِّفُ الۡاٰيٰتِ لَعَلَّهُمۡ يَفۡقَهُونَ ﴿٦٦﴾

67. එමෙන්ම මෙය සත්‍යය වුවද ඔබගේ ජන සමූහය මෙය ප්‍රතික්ෂේප කර ඇත. 'මම නුඹලා වෙනුවෙන් වග කිවයුත්තා නොවෙමි'යි පවසන්න.

وَكَذَّبَ بِهٖ قَوۡمُكَ وَهُوَ الۡحَقُّ ۗ قُل لَّسۡتُ عَلَيۡكُم بِوَكِيلٍ ﴿٦٧﴾

68. සෑම අනාවැකියක් සඳහාම නියමිත වූ කාලයක් සහ ස්ථානයක් ඇත්තේය. තවද නුඹලා ඉක්මනින්ම දැන ගන්නෝමය.

لِّكُلِّ نَبَإٍ مُّسۡتَقَرٌّ ۚ وَسَوۡفَ تَعۡلَمُونَ ﴿٦٨﴾

69. අපගේ වදන් සුළු කොට සලකන්නන්ව ඔබ දුටුවහොත් ඔවුන් මෙය හැර වෙනත් කතා බහක යෙදෙන තෙක් ඔබ ඔවුන්ගෙන් වෙන්වී සිටින්න. ෂෙයිතාන් ඔබව අමතකවීමට සැලැස්සුවහොත් මතක් වූ පසු එවිට අධර්මිෂ්ඨ ජනයා සමඟ එකට අසුන් නොගන්න.

وَإِذَا رَأَيۡتَ الَّذِينَ يَخُوضُونَ فِيٓ اٰيٰتِنَا فَأَعۡرِضۡ عَنۡهُمۡ حَتّٰى يَخُوضُوا فِي حَدِيثٍ غَيۡرِهٖ ۚ وَإِمَّا يُنسِيَنَّكَ الشَّيۡطٰنُ فَلَا تَقۡعُدۡ بَعۡدَ الذِّكۡرٰى مَعَ الۡقَوۡمِ الظّٰلِمِينَ ﴿٦٩﴾

* සටහන. 66: 'යල්බිසකුම්' ( يَلۡبِسَكُمۡ )යන වදනින් ප්‍රකාශ වන්නේ ශරීරයේ ඇලී සිටින අංගයක් බවට පත්වන්නාවූ වස්ත්‍රයක් මෙන් විපත්තියේ ස්වරූපය ලඟා කරගැනීමක්ය. මෙයාකාරයට විශ්වාසනීය පරිවර්තනයකට යම් ස්ථිර වූ ප්‍රකාශයේ භාවිතයක් අවශ්‍ය වී ඇත.

وَمَا عَلَى الَّذِينَ يَتَّقُونَ مِنْ حِسَابِهِم مِّن
شَيْءٍ وَلَٰكِن ذِكْرَىٰ لَعَلَّهُمْ يَتَّقُونَ ﴿٧٠﴾

70. තවද බිය බැතිකම් රකින අයවලුන්ට ඔවුන්ගේ විනිශ්චය සම්බන්ධව කිසිඳු වගකීමක් නොමැත. එහෙත් ඔවුන් (දෙවියන් කෙරෙහි) බිය දැක්වීම සඳහා ඔවුනට අනුශාසනා කිරීම (මොවුන්ගේ යුතුකම) වේ.

وَذَرِ الَّذِينَ اتَّخَذُوا دِينَهُمْ لَعِبًا وَلَهْوًا
وَغَرَّتْهُمُ الْحَيَاةُ الدُّنْيَا ۚ وَذَكِّرْ بِهِ أَن
تُبْسَلَ نَفْسٌ بِمَا كَسَبَتْ لَيْسَ لَهَا مِن
دُونِ اللَّهِ وَلِيٌّ وَلَا شَفِيعٌ وَإِن تَعْدِلْ
كُلَّ عَدْلٍ لَّا يُؤْخَذْ مِنْهَا ۗ أُولَٰئِكَ الَّذِينَ
أُبْسِلُوا بِمَا كَسَبُوا ۖ لَهُمْ شَرَابٌ مِّنْ
حَمِيمٍ وَعَذَابٌ أَلِيمٌ بِمَا كَانُوا
يَكْفُرُونَ ﴿٧١﴾

71. තමන්ගේ ආගම කෙළි සෙල්ලමක් මෙන්ම විනෝදාංශයක් කරගෙන ඇති අයවද, ලෞකික ජීවිතය කවරකු මුලා කළේද ඔවුන්වද ඔබ අත් හරින්න. තවද ආත්මයක්, එය ඉපැයූ දේ හේතුකොට ගෙන විනාශයට පත් නොකරනු ලබන පිණිස ඔබ මෙ(ම කුර්ආන්) මගින් (මිනිසුනට) අනුශාසනා කරන්න. එයට අල්ලාහ් හැරෙන්නට පිහිට වන්නෙකුද නොමැත මැදිහත් වන්නෙකුද නොමැත. එය සියලු ආකාරයේ සමාන වන්දියක් පිරිනැමුව ද එයින් පිළිගනු නොලබන්නේය. සිය ක්‍රියාවන් හේතු කොට ගෙන විනාශයට ලක් කරනු ලැබූවන් මොවුහුම වෙති. මොවුන් අවිශ්වාස කළ හෙයින් පානය කිරීමට උතුරන්නාවූ ජලයද, වේදනීය දඬුවමක් ද ඔවුන්ට ලැබෙනු ඇත.

قُلْ أَنَدْعُو مِن دُونِ اللَّهِ مَا لَا يَنفَعُنَا
وَلَا يَضُرُّنَا وَنُرَدُّ عَلَىٰ أَعْقَابِنَا بَعْدَ إِذْ
هَدَانَا اللَّهُ كَالَّذِي اسْتَهْوَتْهُ الشَّيَاطِينُ
فِي الْأَرْضِ حَيْرَانَ لَهُ أَصْحَابٌ
يَدْعُونَهُ إِلَى الْهُدَى ائْتِنَا ۗ قُلْ إِنَّ هُدَى
اللَّهِ هُوَ الْهُدَىٰ ۖ وَأُمِرْنَا لِنُسْلِمَ لِرَبِّ
الْعَالَمِينَ ﴿٧٢﴾

72. 'අල්ලාහ් හැරෙන්නට අපට ලාභය හෝ අපට හානිය හෝ ඇති කළ නොහැකි දේ අප කැඳවිය යුතුද? එමෙන්ම අල්ලාහ් අපට මග පෙන්වූ පසු දුෂ්ඨයින් මුලාකල අය පොළොවෙහි වික්ෂිප්ත වූවෙකු සේ (හැර දමමින්) අප අපගේ පා විලුඹ මත ආපසු හරවනු ලබන්නෙමුදැ?'යි අසන්න, "(තවද) 'අප වෙත එනු'යි (පවසමින්) යහමග වෙතට ඔහුව කැඳවන මිත්‍රයෝ ඔහුට ඇත්තෝය. ඇත්තවශයෙන්ම අල්ලාහ්ගේ මඟපෙන්වීම පමණක් නියම මඟපෙන්වීමය. තවද සර්ව ලෝකයන්ගේ අධිපතියාණන්ට යටහත් පහත් වීමට අපි අණකරනු ලද්දෙමු"යි පවසන්න.

73. "'තවද නමස්කාරයෙහි යෙදෙනු. ඔහු කෙරෙහි බිය බැතිමත් වනු'(යි නුඹලා අණ කරනු ලැබ ඇත). තවද ඔහු වෙතම නුඹලා එක් රැස් කරනු ලබන්නෝය".

وَاَنْ اَقِيْمُوا الصَّلٰوةَ وَاتَّقُوْهُ ؕ وَهُوَ الَّذِىْۤ اِلَيْهِ تُحْشَرُوْنَ ﴿٧٣﴾

*74. තවද අහස් සහ පොළොව හරියාකාරව මැව්වේ ඔහුමය. තවද ඔහු 'වනුයි!' පවසන දිනයෙහි එය වනු ඇත. ඔහුගේ වදන සත්‍යය වේ. එමෙන්ම (සූර්) නළාව පිඹින ලද්දාවූ දිනයේ රාජධානිය ඔහු සතු වන්නේය. ඔහු දෘශ්‍යමානය ද අදෘශ්‍යමානය ද දන්නාය. ඔහු ප්‍රඥාසම්පන්නය, විමසිලිවන්තයාය.

وَهُوَ الَّذِىْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ بِالْحَقِّ ؕ وَيَوْمَ يَقُوْلُ كُنْ فَيَكُوْنُ ؕ۬ قَوْلُهُ الْحَقُّ ؕ وَلَهُ الْمُلْكُ يَوْمَ يُنْفَخُ فِى الصُّوْرِ ؕ عٰلِمُ الْغَيْبِ وَالشَّهَادَةِ ؕ وَهُوَ الْحَكِيْمُ الْخَبِيْرُ ﴿٧٤﴾

75. තවද 'ඔබ ප්‍රතිමාවන් දෙවිවරුන් සේ සලකන්නේද? ඔබ සහ ඔබගේ පිරිස ප්‍රත්‍යක්ෂ දුර්මාර්ගයෙහි සිටින බව මම ඇත්තවශයෙන්ම දකිමි'යි ඉබ්රාහිම් ඔහුගේ පියා, ආzසර්ට කිවූ අවස්ථාව (සිහිපත් කරන්න).

وَاِذْ قَالَ اِبْرٰهِيْمُ لِاَبِيْهِ اٰزَرَ اَتَتَّخِذُ اَصْنَامًا اٰلِهَةً ۚ اِنِّىْۤ اَرٰٮكَ وَقَوْمَكَ فِىْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٧٥﴾

76. තවද මෙයාකාරයට, අපි ඉබ්රාහිම්ට (ඔහු නිවැරදි මගපෙන්වීම ලබනු පිණිස) අහස් සහ පොළොවෙහි රාජධානිය පෙන්වීමු. එය ඔහු විශ්වාසයේ ස්ථිරභාවයෙන් යුත් අයවලුන්ගෙන් වනු පිණිසය.

وَكَذٰلِكَ نُرِىْۤ اِبْرٰهِيْمَ مَلَكُوْتَ السَّمٰوٰتِ وَالْاَرْضِ وَلِيَكُوْنَ مِنَ الْمُوْقِنِيْنَ ﴿٧٦﴾

77. තවද ඔහු වටා රෑ බෝවූ කල්හි, ඔහු තරුවක් දුටුවේය. 'මෙයද මාගේ අධිපතියාණන්!' යැයි ඔහු කීය. එහෙත් එය බැසයත්ම, 'මම බැසයන දේවල්වලට ප්‍රිය නොකරමි' යි ඔහු කීවේය.

فَلَمَّا جَنَّ عَلَيْهِ الَّيْلُ رَاٰ كَوْكَبًا ۚ قَالَ هٰذَا رَبِّىْ ۚ فَلَمَّاۤ اَفَلَ قَالَ لَاۤ اُحِبُّ الْاٰفِلِيْنَ ﴿٧٧﴾

78. තවද ආලෝකය පතුරුවමින් සඳ පායනු ඔහු දුටු කල්හි, 'මෙයද

فَلَمَّا رَاَ الْقَمَرَ بَازِغًا قَالَ هٰذَا رَبِّىْ ۚ

* සටහන. 74: 'වනු' සහ 'එය වනු ඇත' 'කුන් ෆයකූන්' ( كُنْ فَيَكُوْنُ ) යන ප්‍රකාශය ශූන්‍ය තත්ත්වයේ සිට යතා තත්ත්වයට ඉබේම විපර්යාසය වීම යන්න අදහස නොවේ. දෙවියන් පතන මොහොතේ ඔහුගේ කැමැත්ත හැඩ ගැස්වීමට පටන් ගෙන එය සමගම අවසානයේදී ඔහුගේ කැමැත්තම සිදුවන බව මෙයින් අදහස් වේ.

فَلَمَّآ اَفَلَ قَالَ لَئِنۡ لَّمۡ يَهۡدِنِىۡ رَبِّىۡ لَاَكُوۡنَنَّ مِنَ الۡقَوۡمِ الضَّآلِّيۡنَ ۝٧٨

මාගේ අධිපතියාණන්!' යැයි ඔහු කීය. එහෙත් එය බැස ගිය පසු, 'මාගේ අධිපතියාණන් මා හට මග පෙන්වන්නේ නැත්නම් මා ද නිසැකවම නොමග ගිය මිනිසුන්ගෙන් අයත් වන්නෙමි'යි ඔහු කීවේය.

فَلَمَّا رَاَ الشَّمۡسَ بَازِغَةً قَالَ هٰذَا رَبِّىۡ هٰذَاۤ اَكۡبَرُ‌ۚ فَلَمَّاۤ اَفَلَتۡ قَالَ يٰقَوۡمِ اِنِّىۡ بَرِىۡٓءٌ مِّمَّا تُشۡرِكُوۡنَ ۝٧٩

79. එසේම ආලෝකය පතුරවමින් හිරු උදාවනු ඔහු දුටු කල්හි, 'මෙයද මාගේ අධිපතියාණන්! මෙය (ඒවාටත්) වඩා විශාලයැ'යි ඔහු කීය. එහෙත් එයද බැස ගිය පසු, 'එම්බල මාගේ ජනතාවනි! නුඹලා (දෙවියන්ට) සමාන තබන දැයින් ඇත්තෙන්ම මම මුළුමනින්ම බැහැර වී සිටිමි'යි ඔහු කීවේය.

اِنِّىۡ وَجَّهۡتُ وَجۡهِىَ لِلَّذِىۡ فَطَرَ السَّمٰوٰتِ وَالۡاَرۡضَ حَنِيۡفًا‌ وَّمَاۤ اَنَا مِنَ الۡمُشۡرِكِيۡنَ‌ۚ ۝٨٠

80. 'අහස් සහ පොළොව මැවූ ඔහු වෙත නැඹුරු වෙමින් සත්තකින්ම මම මාගේ අවධානය හැරැව්වෙමි. තවද මම (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් කෙනෙකු නොවෙමි'.

وَحَآجَّهٗ قَوۡمُهٗ‌ ؕ قَالَ اَتُحَآجُّوۡٓنِّىۡ فِى اللّٰهِ وَقَدۡ هَدٰٮنِ‌ ؕ وَلَاۤ اَخَافُ مَا تُشۡرِكُوۡنَ بِهٖۤ اِلَّاۤ اَنۡ يَّشَآءَ رَبِّىۡ شَيۡـــًٔا‌ ؕ وَسِعَ رَبِّىۡ كُلَّ شَىۡءٍ عِلۡمًا‌ ؕ اَفَلَا تَتَذَكَّرُوۡنَ ۝٨١

81. තවද ඔහුගේ ජනතාව ඔහු හා තර්ක කළහ. 'අල්ලාහ් පිළිබඳව නුඹලා මා හා තර්ක කරන්නේ, ඔහු මට යහමඟ පෙන්වා තිබියදීත්ද? මාගේ අධිපතියාණන් අභිමත කරන යමකට විනා නුඹලා ඔහුට සමාන තබන දෙයට මම බිය නොවෙමි. මාගේ අධිපතියාණන් සියලු දේ මත දැනුමෙන් ව්‍යාප්තය. එබැවින් නුඹලා දැනමුතුකම් නොලබන්නේ කුමක් හෙයින්ද?' යි ඔහු පැවසීය.

وَكَيۡفَ اَخَافُ مَاۤ اَشۡرَكۡتُمۡ وَلَا تَخَافُوۡنَ اَنَّكُمۡ اَشۡرَكۡتُمۡ بِاللّٰهِ مَا لَمۡ

82. 'ඔහු නුඹලාට කිසිදු සාක්ෂියක් පහළ කර නොමැති හෙයින්ද, අල්ලාහ්ට නුඹලා සමාන තබන දේ කෙරෙහි නුඹලාද බිය නොවන කල්හිද, නුඹලා (අල්ලාහ්ට)

يُنَزِّلْ بِهٖ عَلَيْكُمْ سُلْطٰنًا ؕ فَاَىُّ الْفَرِيْقَيْنِ اَحَقُّ بِالْاَمْنِ ۚ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿٨٢﴾

සමාන තබන දේ කෙරෙහි මා බිය විය යුත්තේ ඇයි?' එහෙයින් සත්තකින්ම නුඹලා දන්නේ නම්, ආරක්ෂාව ලැබීමට වඩා හිමිකම් ඇත්තේ අප දෙපාර්ශවයෙන් කවරෙකුටදැ? (යි කියනු).

اَلَّذِيْنَ اٰمَنُوْا وَلَمْ يَلْبِسُوْٓا اِيْمَانَهُمْ بِظُلْمٍ اُولٰٓئِكَ لَهُمُ الْاَمْنُ وَهُمْ مُّهْتَدُوْنَ ﴿٨٣﴾

83. විශ්වාස කරමින් තමන්ගේ විශ්වාසය අයුක්තිය සමඟ පටලවා නොගන්නන් හට සාමය ඇත. යහමග ලද්දෝ ඔවුන්මය.

وَتِلْكَ حُجَّتُنَآ اٰتَيْنٰهَآ اِبْرٰهِيْمَ عَلٰى قَوْمِهٖ ؕ نَرْفَعُ دَرَجٰتٍ مَّنْ نَّشَآءُ ؕ اِنَّ رَبَّكَ حَكِيْمٌ عَلِيْمٌ ﴿٨٤﴾

84. තවද මෙය අපගේ තර්කයකි. අපි එය ඉබ්රාහිම්ට ඔහුගේ ජනතාවට එරෙහිව දුන්නෙමු. අප කැමති අයට අපි තරාතිරම් උසස් බවට පත් කරමු. ඇත්තෙන්ම ඔබගේ අධිපතියාණන් ප්‍රඥා සම්පන්නය, සියල්ල දත්තාය.

وَوَهَبْنَا لَهٗٓ اِسْحٰقَ وَيَعْقُوْبَ ؕ كُلًّا هَدَيْنَا ۚ وَنُوْحًا هَدَيْنَا مِنْ قَبْلُ وَمِنْ ذُرِّيَّتِهٖ دَاوٗدَ وَسُلَيْمٰنَ وَاَيُّوْبَ وَيُوْسُفَ وَمُوْسٰى وَهٰرُوْنَ ؕ وَكَذٰلِكَ نَجْزِى الْمُحْسِنِيْنَ ﴿٨٥﴾

85. තවද අපි ඔහුට ඉස්හාක් ද යඃකූබ් ද පිරිනැමුවෙමු. අපි (ඒ) සැමට යහමග ලබා දුනිමු. (මෙයට) පෙර අපි නූහ්ටද යහමග ලබාදී ඇත්තෙමු. එමෙන්ම ඔහුගේ පැවත එන්නන්ගෙන් දාවූද්ටද, සුලෙමාන්ටද, අයියූබ්ටද, යූසුෆ්ටද, මූසා හා හාරූන්ටද (යහමග ලබා දුන්නෙමු). මෙසේ අපි යහපත් ක්‍රියාවෙහි යෙදෙන්නන් හට තිළිණ ප්‍රදානය කරමු.

وَزَكَرِيَّا وَيَحْيٰى وَعِيْسٰى وَاِلْيَاسَ ؕ كُلٌّ مِّنَ الصّٰلِحِيْنَ ﴿٨٦﴾

86. තවද zසකරියියාටද, යහ්යාටද, ඊසාටද, ඉල්යාස්ටද (අපි යහමග දුන්නෙමු) ඔවුන් සියල්ලෝම ධාර්මිෂ්ඨකයින්ගෙන් වූහ.

وَاِسْمٰعِيْلَ وَالْيَسَعَ وَيُوْنُسَ وَلُوْطًا ؕ وَكُلًّا فَضَّلْنَا عَلَى الْعٰلَمِيْنَ ﴿٨٧﴾

87. තවද ඉස්මාඊල්ටද, යසඃටද, යූනුස්ටද, ලූත්ටද (අපි යහමග දුන්නෙමු) තවද ඔවුන් සියල්ලන්ට එම ජනතාවන් මත උසස් භාවය ලබා දුන්නෙමු.

88. තවද (අපි) ඔවුන්ගේ පියවරුන්, ඔවුන්ගේ දූ දරුවන් හා ඔවුන්ගේ සොහොයුරන්ගෙන් සමහරුන්ව (අපි උසස් කළෙමු). තවද අපි ඔවුන් තෝරාගත්තෙමු. තවද අපි ඔවුන්ව ඍජු මාර්ගය වෙත යොමු කළෙමු.

وَمِنْ اٰبَآئِهِمْ وَذُرِّيّٰتِهِمْ وَاِخْوَانِهِمْ ۚ وَاجْتَبَيْنٰهُمْ وَهَدَيْنٰهُمْ اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٨٨﴾

89. මෙයම අල්ලාහ්ගේ මග පෙන්වීම වේ. මෙමගින් ඔහු තම දාසයන් අතුරින් තමා කැමති අයට යහ මග පෙන්වන්නේය. තවද ඔවුන් ඔහු හැර කිසිවක් නැමදුවේ නම්, නියතවශයෙන්ම ඔවුන් කළ සියල්ලම ඔවුනට පලක් නොවනු ඇත.

ذٰلِكَ هُدَى اللّٰهِ يَهْدِيْ بِهٖ مَنْ يَّشَآءُ مِنْ عِبَادِهٖ ۗ وَلَوْ اَشْرَكُوْا لَحَبِطَ عَنْهُمْ مَّا كَانُوْا يَعْمَلُوْنَ ﴿٨٩﴾

90. අප පුස්තකයද විනිශ්චයේ බුද්ධියද වක්තෘභාවයද පිරිනැමුවේ මේ අයටමය. එහෙත් මේ අය ඒවාට අකෘතඥවන්නේ නම් එය (කම් නැත). ඒවාට අකෘතඥ නොවන ජනතාවට අපි දැන් ඒවා පවරා ඇත්තෙමු.

اُولٰٓئِكَ الَّذِيْنَ اٰتَيْنٰهُمُ الْكِتٰبَ وَالْحُكْمَ وَالنُّبُوَّةَ ۚ فَاِنْ يَّكْفُرْ بِهَا هٰٓؤُلَآءِ فَقَدْ وَكَّلْنَا بِهَا قَوْمًا لَّيْسُوْا بِهَا بِكٰفِرِيْنَ ﴿٩٠﴾

91. අල්ලාහ් යහ මග පෙන්වූයේ මොවුන්ටමය. එබැවින් ඔබ ඔවුන්ගේ මග පෙන්වීම අනුගමනය කරන්න. පවසන්න, 'ඒ සඳහා මා නුඹලාගෙන් කිසිඳු තිළිණයක් නොඉල්ලමි. මෙය සියළු මනුෂ්‍ය වර්ගයාට දැනමුතුකමක් මිස නොවේ'.

اُولٰٓئِكَ الَّذِيْنَ هَدَى اللّٰهُ فَبِهُدٰىهُمُ اقْتَدِهْ ۗ قُلْ لَّآ اَسْـَٔلُكُمْ عَلَيْهِ اَجْرًا ۗ اِنْ هُوَ اِلَّا ذِكْرٰى لِلْعٰلَمِيْنَ ﴿٩١﴾ ع

92. තවද 'අල්ලාහ් කිසිවෙකුට කිසිවක් හෙළිදරව් කර නොමැත.' යැයි ඔවුන් පවසන කල්හි ඔවුන් අල්ලාහ්ට, ඔහුට ගරු කළයුතු ආකාරයට ගරු කළේ නැත. පවසන්න, 'ජනතාවට ආලෝකය මෙන්ම මගපෙන්වීමක් වන්නාවූ මූසා ගෙන ආ පුස්තකය හෙළිදරව් කළේ කවරෙක්ද? නුඹලා එය ඉවතලන කඩදාසි බවට පත්කළෙහුය. ඉන් සමහරක් නුඹලා එළිකරන අතර බොහොමයක් නුඹලා සඟවන්නෙහුය. තවද නුඹලාද නුඹලාගේ පියවරුන්ද නොදත්දේ නුඹලාට උගන්වන ලදී. (එය කළේ)'අල්ලාහ්' යැ'යි පවසන්න.

وَمَا قَدَرُوا اللّٰهَ حَقَّ قَدْرِهٖٓ اِذْ قَالُوْا مَآ اَنْزَلَ اللّٰهُ عَلٰى بَشَرٍ مِّنْ شَيْءٍ ۗ قُلْ مَنْ اَنْزَلَ الْكِتٰبَ الَّذِيْ جَآءَ بِهٖ مُوْسٰى نُوْرًا وَّهُدًى لِّلنَّاسِ تَجْعَلُوْنَهٗ قَرَاطِيْسَ تُبْدُوْنَهَا وَتُخْفُوْنَ كَثِيْرًا ۚ وَعُلِّمْتُمْ مَّا لَمْ تَعْلَمُوْٓا اَنْتُمْ وَلَآ اٰبَآؤُكُمْ ۗ قُلِ اللّٰهُ ۙ

ثُمَّ ذَرْهُمْ فِي خَوْضِهِمْ يَلْعَبُونَ ﴿٩٢﴾

පසුව ඔවුන්ගේ නිශ්ඵල කතාවෙහි ඔවුන් විනෝද වීමට ඔවුන්ව ඉඩ හරින්න.

وَهَٰذَا كِتَابٌ أَنزَلْنَاهُ مُبَارَكٌ مُّصَدِّقُ الَّذِي بَيْنَ يَدَيْهِ وَلِتُنذِرَ أُمَّ الْقُرَىٰ وَمَنْ حَوْلَهَا ۚ وَالَّذِينَ يُؤْمِنُونَ بِالْآخِرَةِ يُؤْمِنُونَ بِهِ ۖ وَهُمْ عَلَىٰ صَلَاتِهِمْ يُحَافِظُونَ ﴿٩٣﴾

93. තවද මෙය අප පහළ කර ඇති ආශිර්වාදයන්ගෙන් පිරි පුස්තකයකි. මෙය ඊට පෙරවූ දේ සම්පූර්ණ කරන්නෙකි. තවද (එය) ඔබ මව් නගරයටත් ඒ අවට සිටින්නන්ටත් අවවාද කරනු පිණිසය. තවද පරලොව කෙරෙහි විශ්වාස කරන අය මෙයද විශ්වාස කරන අතර ඔවුහු සිය නමස්කාරයන් දැඩිව රැකගන්නන් වෙති.

وَمَنْ أَظْلَمُ مِمَّنِ افْتَرَىٰ عَلَى اللَّهِ كَذِبًا أَوْ قَالَ أُوحِيَ إِلَيَّ وَلَمْ يُوحَ إِلَيْهِ شَيْءٌ وَمَن قَالَ سَأُنزِلُ مِثْلَ مَا أَنزَلَ اللَّهُ ۗ وَلَوْ تَرَىٰ إِذِ الظَّالِمُونَ فِي غَمَرَاتِ الْمَوْتِ وَالْمَلَائِكَةُ بَاسِطُو أَيْدِيهِمْ أَخْرِجُوا أَنفُسَكُمُ ۖ الْيَوْمَ تُجْزَوْنَ عَذَابَ الْهُونِ بِمَا كُنتُمْ تَقُولُونَ عَلَى اللَّهِ غَيْرَ الْحَقِّ وَكُنتُمْ عَنْ آيَاتِهِ تَسْتَكْبِرُونَ ﴿٩٤﴾

94. තවද අල්ලාහ්ට එරෙහිව බොරු ගෙතූ අයට වඩා හෝ තමා වෙත කිසිවක් හෙළිදරව් නොකරනු ලැබ සිටියදීත් 'මාවෙත එය හෙළිදරව් කරනු ලැබ ඇතැ'යි පවසන අයට වඩා හෝ 'අල්ලාහ් පහළ කර ඇති දේ මෙන් මමද පහළ කරන්නෙමි'යි පවසන අයට වඩා අදමිටුවා කවරෙක්ද? තවද වරදකරුවන් මරණ වේදනාවෙන්හි පසුවන අවස්ථාව ඔබ දුටුවහොත්, තවද දේවදූතයෝ තම අත් දිගු කොට 'නුඹලාගේ ප්‍රාණයන් පිටතට ගනු. නුඹලා අල්ලාහ්ට එරෙහිව අසත්‍යයව කතා කළ බැවින්ද නුඹලා ඔහුගේ සළකුණු වෙතින් උඩඟුකමින් ඉවතට හැරුණු (බැවින්ද) මෙදින නුඹලා අවමානයේ දඬුවම් ලබන්නෝයැ'(යි පවසති).

وَلَقَدْ جِئْتُمُونَا فُرَادَىٰ كَمَا خَلَقْنَاكُمْ أَوَّلَ مَرَّةٍ وَتَرَكْتُم مَّا خَوَّلْنَاكُمْ وَرَاءَ ظُهُورِكُمْ ۖ وَمَا نَرَىٰ مَعَكُمْ

95. තවද පළමුව අප නුඹලා මැවූ ආකාරයට නුඹලා එකිනෙකා දැන් අප වෙත පැමිණෙන්නෙහුය. තවද අප නුඹලා කෙරෙහි අනුග්‍රහ කළ දේ නුඹලා පසුපසට දමා ඇත්තෙහුය. තවද නුඹලාගේ කටයුතු

شُفَعَآءَكُمُ الَّذِيۡنَ زَعَمۡتُمۡ اَنَّهُمۡ فِيۡكُمۡ شُرَكٰٓؤُا ؕ لَقَدۡ تَّقَطَّعَ بَيۡنَكُمۡ وَضَلَّ عَنۡكُمۡ مَّا كُنۡتُمۡ تَزۡعُمُوۡنَ ﴿۹۵﴾

සම්බන්ධයෙන් දෙවියන් (සමග) මොවුන් හවුල්කරුවන්යැයි නුඹලා ස්ථිරව තහවුරු කළ නුඹලාගේ මැදිහත් කරුවන්ව අපි නුඹලා සමඟ නොදකිමු. දැන් නුඹලා එකිනෙකාගෙන් වෙන්වී ඇති අතර නුඹලා අනුමාන කළ දේ නුඹලාගෙන් නැති වී ගොස් ඇත.

اِنَّ اللّٰهَ فَالِقُ الۡحَبِّ وَالنَّوٰى ؕ يُخۡرِجُ الۡحَىَّ مِنَ الۡمَيِّتِ وَمُخۡرِجُ الۡمَيِّتِ مِنَ الۡحَىِّ ؕ ذٰ لِكُمُ اللّٰهُ فَاَنّٰى تُؤۡفَكُوۡنَ ﴿۹۶﴾

96. ඇත්තවශයෙන්ම ධාන්‍ය සහ රට ඉඳි ඇට දළුලන්නේ අල්ලාහ්මය. ඔහු අජීව දැයින් ජීවය හෙළි කරන්නේය. තවද (ඔහු) ජීවයෙන් අජීවය හෙළි කරන්නාය. මොහුම නුඹලාගේ අල්ලාහ් වේ. එසේනම් නුඹලා කොහේ හරවනු ලැබුවේද?

فَالِقُ الۡاِصۡبَاحِ ۚ وَجَعَلَ الَّيۡلَ سَكَنًا وَّالشَّمۡسَ وَالۡقَمَرَ حُسۡبَانًا ؕ ذٰ لِكَ تَقۡدِيۡرُ الۡعَزِيۡزِ الۡعَلِيۡمِ ﴿۹۷﴾

97. ඔහු දවස උදා වීමට සලස්වන්නේය. තවද ඔහු විවේකය සඳහා රාත්‍රියද, (කාලය) මැනීම සඳහා ඉරද හඳද ඇති කළේය. බලසම්පන්න සහ සියල්ල දත්තාගේ නියමය එය වේ.

وَهُوَ الَّذِىۡ جَعَلَ لَـكُمُ النُّجُوۡمَ لِتَهۡتَدُوۡا بِهَا فِىۡ ظُلُمٰتِ الۡبَرِّ وَالۡبَحۡرِ ؕ قَدۡ فَصَّلۡنَا الۡاٰيٰتِ لِقَوۡمٍ يَّعۡلَمُوۡنَ ﴿۹۸﴾

98. තවද ඔහු තාරකාවන් මවා ඇත්තේ, ඒවායේ ආධාරයෙන් ගොඩබිම සහ මුහුදේ ඝන අන්ධකාරය තුළින්, නුඹලාට නිවැරදි මාර්ගය අනුගමනය කිරීමටය. අපි දැනුමැති පිරිසට සළකුණු විස්තර සහිතව පැහැදිලි කර ඇත්තෙමු.

وَهُوَ الَّذِىۡۤ اَنۡشَاَكُمۡ مِّنۡ نَّفۡسٍ وَّاحِدَةٍ فَمُسۡتَقَرٌّ وَّمُسۡتَوۡدَعٌ ؕ قَدۡ فَصَّلۡنَا الۡاٰيٰتِ لِقَوۡمٍ يَّفۡقَهُوۡنَ ﴿۹۹﴾

99. තවද එක් ප්‍රාණයකින් නුඹලාව ඇති කළේ ඔහුමය. තවද (නුඹලා සඳහා) තාවකාලික නවාතැනක්ද ස්ථිර සුරැකුම් තැනක්ද වේ. අපි වටහාගන්නා ජනතාවකට සළකුණු පැහැදිලි කර ඇත්තෙමු.

وَهُوَ الَّذِىۡۤ اَنۡزَلَ مِنَ السَّمَآءِ مَآءً ۚ فَاَخۡرَجۡنَا بِهٖ نَبَاتَ كُلِّ شَىۡءٍ فَاَخۡرَجۡنَا

100. තවද වළාකුළින් ජලය පහළ කරන්නේ ඔහුමය. තවද එමගින් අපි සෑම වර්ගයකම පැල ඇති කරන්නෙමු. පසුව අපි හරිත ශාක උත්පාදනය කර එමගින් පොකුරුවු ධාන්‍යද ඇති

مِنْهُ خَضِرًا نُّخْرِجُ مِنْهُ حَبًّا مُّتَرَاكِبًا ۚ
وَمِنَ النَّخْلِ مِنْ طَلْعِهَا قِنْوَانٌ دَانِيَةٌ
وَّجَنّٰتٍ مِّنْ اَعْنَابٍ وَّالزَّيْتُوْنَ
وَالرُّمَّانَ مُشْتَبِهًا وَّغَيْرَ مُتَشَابِهٍ ۗ
اُنْظُرُوْٓا اِلٰى ثَمَرِهٖٓ اِذَآ اَثْمَرَ وَيَنْعِهٖ ۗ
اِنَّ فِيْ ذٰلِكُمْ لَاٰيٰتٍ لِّقَوْمٍ يُّؤْمِنُوْنَ ﴿١٠٠﴾

කරන්නෙමු. තවද කෝෂවලින් පොකුරු පහලට එල්ලා වැටෙන රටඉඳි ගස්ද ඇත. තවද (අපි එමගින්) සමානව සහ අසමානව මිදි, ඔලිව් හා දෙළුම් උයන්ද (ඇති කරන්නෙමු). එම පළතුරු දෙස එය එලදරන විට එය පැසෙන සැටි බලනු. ඇත්තවශයෙන්ම විශ්වාස කරන ජනතාවට මෙහි සලකුණු ඇත.

وَجَعَلُوْا لِلّٰهِ شُرَكَآءَ الْجِنَّ وَخَلَقَهُمْ
وَخَرَقُوْا لَهٗ بَنِيْنَ وَبَنٰتٍۢ بِغَيْرِ عِلْمٍ ۗ
سُبْحٰنَهٗ وَتَعٰلٰى عَمَّا يَصِفُوْنَ ﴿١٠١﴾ ع

101. තවද ඔවුහු ජින්වරුන්ව අල්ලාහ්ට සමාන කරති. එනමුත් ඔවුන්ව මැව්වේ ඔහුමය. ඔවුහු කිසිඳු දැනුමකින් තොරව වැරදි ලෙස ඔහුට පුතුන් හා දියණියන් ආරෝපණය කරති. ඔහු පරිශුද්ධ මෙන්ම ඔවුන් (ඔහුට) වර්ණනා කරන දෙයට(ත්) වඩා අති උතුම්ය.

بَدِيْعُ السَّمٰوٰتِ وَالْاَرْضِ ۗ اَنّٰى يَكُوْنُ
لَهٗ وَلَدٌ وَّلَمْ تَكُنْ لَّهٗ صَاحِبَةٌ ۗ وَخَلَقَ
كُلَّ شَيْءٍ ۚ وَهُوَ بِكُلِّ شَيْءٍ عَلِيْمٌ ﴿١٠٢﴾

102. අහස්හිද පොළොවෙහිද අද්විතිය උත්පාදකයාය. ඔහුට භාර්යයාවක් නැති කල්හි, ඔහුට පුතෙකු ලැබිය හැක්කේ කෙසේද? තවද ඔහු සියලුම දේ මවා ඇත. තවද ඔහු සියළු දේ කෙරෙහි සම්පූර්ණ දැනුම ඇත්තාය.

ذٰلِكُمُ اللّٰهُ رَبُّكُمْ ۚ لَآ اِلٰهَ اِلَّا هُوَ ۚ
خَالِقُ كُلِّ شَيْءٍ فَاعْبُدُوْهُ ۚ وَهُوَ عَلٰى
كُلِّ شَيْءٍ وَّكِيْلٌ ﴿١٠٣﴾

103. එවැන්නා අල්ලාහ්ය, නුඹලාගේ අධිපතියාණන්ය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නොමැත. සියලුම දෑ හි මැවුම්කරුවාය. එබැවින් ඔහුට නමදිනු. ඔහු සියළු දේ කෙරෙහි සුපරීක්ෂකයාය.

لَا تُدْرِكُهُ الْاَبْصَارُ ۖ وَهُوَ يُدْرِكُ
الْاَبْصَارَ ۚ وَهُوَ اللَّطِيْفُ الْخَبِيْرُ ﴿١٠٤﴾

104. දෘෂ්ඨීන් ඔහු කරා ලඟා විය නොහැක. එහෙත් දෘෂ්ඨීන් කරා ඔහු ලඟා වන්නේය. තවද ඔහු සූක්ෂම ඥානය ඇත්තාය, සියල්ලෙහිම විමසිලිවන්තයාය.

قَدْ جَآءَكُم بَصَآئِرُ مِن رَّبِّكُمْ ۖ فَمَنْ أَبْصَرَ فَلِنَفْسِهِۦ ۖ وَمَنْ عَمِىَ فَعَلَيْهَا ۚ وَمَآ أَنَا۠ عَلَيْكُم بِحَفِيظٍ ﴿١٠٥﴾

105. නිශ්චිතවම නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලා වෙත සාධක පැමිණ ඇත. එහෙයින් කවරෙකු හෝ දැක ගන්නේ ද, එය ඔහුගේම යහපත පිණිසය. තවද කවරෙකු හෝ අන්ධවන්නේ ද එය ඔහුටම හානියක්ය. තවද මම නුඹලා මත ආරක්ෂකයෙකු නොවෙමි.

وَكَذَٰلِكَ نُصَرِّفُ ٱلْءَايَٰتِ وَلِيَقُولُوا۟ دَرَسْتَ وَلِنُبَيِّنَهُۥ لِقَوْمٍ يَعْلَمُونَ ﴿١٠٦﴾

106. තවද අප මෙලෙස (සත්‍ය තහවුරු කරනු පිණිස) සලකුණු විවිධාකාරව දක්වා ඇත්තේ (එහි ප්‍රතිඵලය) 'ඔබ (මැනැවින්) ඉගෙන ගෙන ඇත'යි ඔවුන් කියනු පිණිසත් (අප සලකුණු විවිධාකාරව දක්වා ඇත්තේ) දැනුමැති පිරිසකට එය විස්තර කරනු පිණිසත් වේ.

ٱتَّبِعْ مَآ أُوحِىَ إِلَيْكَ مِن رَّبِّكَ ۖ لَآ إِلَٰهَ إِلَّا هُوَ ۖ وَأَعْرِضْ عَنِ ٱلْمُشْرِكِينَ ﴿١٠٧﴾

107. ඔබගේ අධිපතියාණන් විසින් ඔබට අනාවරණය කරනු ලැබූ දේ අනුගමනය කරන්න. ඔහු හැර නැමදීමට සුදුස්සෙකු නොමැත. තවද ප්‍රතිමා වඳින්නන්ගෙන් ඉවත් වන්න.

وَلَوْ شَآءَ ٱللَّهُ مَآ أَشْرَكُوا۟ ۗ وَمَا جَعَلْنَٰكَ عَلَيْهِمْ حَفِيظًا ۖ وَمَآ أَنتَ عَلَيْهِم بِوَكِيلٍ ﴿١٠٨﴾

108. තවද අල්ලාහ් (ඔහුගේ) අභිමත(ය ක්‍රියාත්මක) කළේ නම්, ඔවුන් ඔහුට සමානයන් නොතබනු ඇත. තවද අපි ඔබව ඔවුන් මත ආරක්ෂකයෙකු නොකළෙමු. ඔබ ඔවුන් කෙරෙහි භාරකාරයෙකුද නොවේ.

وَلَا تَسُبُّوا۟ ٱلَّذِينَ يَدْعُونَ مِن دُونِ ٱللَّهِ فَيَسُبُّوا۟ ٱللَّهَ عَدْوًۢا بِغَيْرِ عِلْمٍ ۗ كَذَٰلِكَ زَيَّنَّا لِكُلِّ أُمَّةٍ عَمَلَهُمْ ثُمَّ إِلَىٰ رَبِّهِم مَّرْجِعُهُمْ فَيُنَبِّئُهُم بِمَا كَانُوا۟ يَعْمَلُونَ ﴿١٠٩﴾

109. තවද අල්ලාහ් හැර ඔවුන් කවර අයව අයදින්නේද ඒ අයට අපවාද නොකරනු. නැතහොත් ඔවුන් සතුරුකම හේතුකොට ගෙන (ඔවුන්ගේ) නොදැනුවත්කම නිසා අල්ලාහ්ට අපවාද කරන්නෝය. මෙලෙස අපි සෑම ජනකොටසකටම ඔවුන්ගේ ක්‍රියාවන් අලංකාරව (පෙනෙන්නට) සැලැස්වුවෙමු. පසුව ඔවුන්ගේ ආපසු පැමිණීම සිය අධිපතියාණන් වෙත වේ. තවද ඔවුන් කරමින් සිටි දේ පිළිබඳව ඔහු ඔවුන්ට දැනුම් දෙන්නේය.

وَ اَقْسَمُوْا بِاللّٰهِ جَهْدَ اَيْمَانِهِمْ لَئِنْ جَآءَتْهُمْ اٰيَةٌ لَّيُؤْمِنُنَّ بِهَا ؕ قُلْ اِنَّمَا الْاٰيٰتُ عِنْدَ اللّٰهِ وَمَا يُشْعِرُكُمْ ۙ اَنَّهَاۤ اِذَا جَآءَتْ لَا يُؤْمِنُوْنَ ﴿١١٠﴾

110. තවද තමන් වෙත එක් සලකුණක් වත් පැමිණියහොත් නියතවශයෙන්ම ඔවුන් එය විශ්වාස කරන බව ඔවුහු ඔවුන්ගේ දැඩි දිවුරුම් වලින් අල්ලාහ් මත දිවුරති. 'ඇත්තෙන්ම සලකුණුද එමෙන්ම ඒවා පැමිණෙන විට ඔවුන් එය විශ්වාස නොකරන බව නුඹලාට වටහා දෙන දේද අල්ලාහ් සතුව ඇතැ'යි පවසන්න.

وَنُقَلِّبُ اَفْـِٕدَتَهُمْ وَاَبْصَارَهُمْ كَمَا لَمْ يُؤْمِنُوْا بِهٖۤ اَوَّلَ مَرَّةٍ وَّنَذَرُهُمْ فِيْ طُغْيَانِهِمْ يَعْمَهُوْنَ ﴿١١١﴾ ع

111. තවද ඔවුන් මුලදී අපගේ සලකුණු ප්‍රතික්ෂේප කළාක් මෙන් අපි ඔවුන්ගේ හදවත් සහ ඔවුන්ගේ පෙනීමේ හැකියාවන් එම තත්ත්වයටම පෙරළා හරින්නෙමු. එමෙන්ම තමන්ගේ සීමාව ඉක්මවීමේ ක්‍රියාවන්හි ව්‍යාකූලව අයාලේ යෑමට අපි ඔවුන්ව අත් හරින්නෙමු.

وَلَوْ اَنَّنَا نَزَّلْنَاۤ اِلَيْهِمُ الْمَلٰٓئِكَةَ وَكَلَّمَهُمُ الْمَوْتٰى وَحَشَرْنَا عَلَيْهِمْ كُلَّ شَيْءٍ قُبُلًا مَّا كَانُوْا لِيُؤْمِنُوْۤا اِلَّاۤ اَنْ يَّشَآءَ اللّٰهُ وَلٰكِنَّ اَكْثَرَهُمْ يَجْهَلُوْنَ ﴿١١٢﴾

8 කොටස

112. තවද අප ඔවුන්වෙත සුර දූතයින් යැවුවද, මළවුන් ඔවුන් සමඟ කථා කළද, අප සියලු දේ ඔවුන් වෙත මුහුණට මුහුණ ලා එක්රැස් කළද, අල්ලාහ් (ඔහුගේ) අභිමත(ය ක්‍රියාත්මක) කිරීමෙන් තොරව ඔවුහු විශ්වාස නොකරන්නෝය. එහෙත් ඔවුන්ගෙන් බොහෝ අය අඥානව ක්‍රියා කරති.

وَكَذٰلِكَ جَعَلْنَا لِكُلِّ نَبِيٍّ عَدُوًّا شَيٰطِيْنَ الْاِنْسِ وَالْجِنِّ يُوْحِيْ بَعْضُهُمْ اِلٰى بَعْضٍ زُخْرُفَ الْقَوْلِ غُرُوْرًا ؕ وَلَوْ شَآءَ رَبُّكَ مَا فَعَلُوْهُ فَذَرْهُمْ وَمَا يَفْتَرُوْنَ ﴿١١٣﴾

113. තවද මෙයාකාරයටම මනුෂ්‍යයන් සහ ජින්වරුන් අතරින් දුෂ්ටයින්ව අපි සෑම වක්තෘවරයෙක් සඳහාම සතුරෙකු ලෙස කළෙමු. ඔවුන්ගෙන් සමහරෙක් සමහරෙකුව රැවටීම සඳහා මුළා බස් තුලින් අදහස් පළ කරති. තවද අල්ලාහ් (ඔහුගේ) අභිමත(ය ක්‍රියාත්මක) කළේ නම්, ඔවුන් එය නොකරනු ඇත. එබැවින් ඔවුන් ගොතන දේ සමඟ ඔවුන්වද හැර දමන්න.

114. තවද පරලොව කෙරෙහි විශ්වාස නොකරන්නන්ගේ හදවත් එය (මුළා බස්) වෙත නැඹුරුවනු පිණිසද, එයින් ඔවුන් තෘප්ති වනු පිණිසද, ඔවුන් උපයමින් සිටි දේ (නරක ක්‍රියාවන්) ඔවුන් (නිරතුරුවම) උපයනු පිණිසද වේ.

وَلِتَصْغٰۤى اِلَيْهِ اَفْـِٕدَةُ الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ وَلِيَرْضَوْهُ وَلِيَقْتَرِفُوْا مَا هُمْ مُّقْتَرِفُوْنَ ﴿١١٤﴾

115. ඔහු නුඹලාට පැහැදිලි විස්තර සහිත ග්‍රන්ථයක් පහළ කර තිබියදීත්, මම අල්ලාහ් හැරෙන්නට වෙනත් විනිශ්චයකරුවෙකු පතන්නෙම්ද? තවද කවුරුන්ට අප ග්‍රන්ථය දී ඇත්තේද, මෙය ඔබගේ අධිපතියාණන් වෙතින් සත්‍යය සමග පහළ කරන ලද්දැයි ඔවුහු දනිති. එබැවින් ඔබ(ද) සැක කරන්නවුන් අතරට එක් නොවන්න.

اَفَغَيْرَ اللّٰهِ اَبْتَغِىْ حَكَمًا وَّهُوَ الَّذِىْۤ اَنْزَلَ اِلَيْكُمُ الْكِتٰبَ مُفَصَّلًا ؕ وَالَّذِيْنَ اٰتَيْنٰهُمُ الْكِتٰبَ يَعْلَمُوْنَ اَنَّهٗ مُنَزَّلٌ مِّنْ رَّبِّكَ بِالْحَقِّ فَلَا تَكُوْنَنَّ مِنَ الْمُمْتَرِيْنَ ﴿١١٥﴾

116. ඔබගේ අධිපතියාණන්ගේ වචනය සත්‍ය හා යුක්තියෙන් ඉටුවී ඇත. ඔහුගේ වදන් වෙනස්කරන්නෙකු නොමැත. සියල්ල අසන්නාද, සියල්ල දන්නාද, ඔහුමය.

وَتَمَّتْ كَلِمَتُ رَبِّكَ صِدْقًا وَّعَدْلًا ؕ لَا مُبَدِّلَ لِكَلِمٰتِهٖ ۚ وَهُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿١١٦﴾

*117. තවද පොළොවෙහි සිටින බහුතර අයව ඔබ අනුගමනය කළේනම්, ඔවුහු ඔබව අල්ලාහ්ගේ මාර්ගයෙන් නොමග යවන්නෝය. ඔවුන් අනුගමනය කරන්නේ (හුදෙක්) අනුමානය මිස අන් කිසිවක් නොවේ. එමෙන්ම ඔවුන් බොරුව මිස අන් කිසිවක් නොකරති.

وَاِنْ تُطِعْ اَكْثَرَ مَنْ فِى الْاَرْضِ يُضِلُّوْكَ عَنْ سَبِيْلِ اللّٰهِ ؕ اِنْ يَّتَّبِعُوْنَ اِلَّا الظَّنَّ وَاِنْ هُمْ اِلَّا يَخْرُصُوْنَ ﴿١١٧﴾

118. ඇත්තවශයෙන්ම ඔබගේ අධිපතියාණන්, ඔහුගේ මාර්ගයෙන් නොමඟ යන්නවුන්ව මැනැවින් දන්නේය. තවද ඔහු යහමග ලබන්නන්ව මැනැවින් දන්නේය.

اِنَّ رَبَّكَ هُوَ اَعْلَمُ مَنْ يَّضِلُّ عَنْ سَبِيْلِهٖ ۚ وَهُوَ اَعْلَمُ بِالْمُهْتَدِيْنَ ﴿١١٨﴾

119. එබැවින් නුඹලා ඔහුගේ සලකුණු කෙරෙහි විශ්වාස කරන්නන් වේ නම්, අල්ලාහ්ගේ නාමය

فَكُلُوْا مِمَّا ذُكِرَ اسْمُ اللّٰهِ عَلَيْهِ اِنْ

* සටහන. 117: අනාගතය පිළිබඳව මතු සිදුවන දේ ගැන පුහු අනුමානයෙන් පමණක් තමන්ව පිනවමින් ප්‍රකාශ කිරීමට හැකි වන්නාවූ ශෛතිම හා මවා පෑම වැනි පුළුල් ලක්ෂණයන් දෙන 'යක්රුසූන්' ( يَخْرُصُوْنَ )යන වචනයට සම්පූර්ණ තේරුමක් දීමට මෙහි 'බොරුව' යන වචනය සාධාරණය ඉටු කිරීමට ප්‍රමාණවත් නොවන්නේය.

كُنتُم بِـَٔايَٰتِهِۦ مُؤْمِنِينَ ١١٩

ආමන්ත්‍රණය කරනු ලැබූ දේ අනුභව කරනු.

وَمَا لَكُمْ أَلَّا تَأْكُلُوا۟ مِمَّا ذُكِرَ ٱسْمُ ٱللَّهِ عَلَيْهِ وَقَدْ فَصَّلَ لَكُم مَّا حَرَّمَ عَلَيْكُمْ إِلَّا مَا ٱضْطُرِرْتُمْ إِلَيْهِ ۗ وَإِنَّ كَثِيرًا لَّيُضِلُّونَ بِأَهْوَآئِهِم بِغَيْرِ عِلْمٍ ۗ إِنَّ رَبَّكَ هُوَ أَعْلَمُ بِٱلْمُعْتَدِينَ ١٢٠

120. තවද නුඹලා බලපෑමකට ලක්වූ අවස්ථාවේ හැරෙන්නට (අනුභව නොකළ යුතු යැයි) ඔහු නුඹලාට තහනම් කර ඇති දේ කුමක් දැයි ඔහු දැනටමත් නුඹලාට ඉතා පැහැදිලිව විස්තර කර තිබියදීත්, අල්ලාහ්ගේ නාමය ආමන්ත්‍රණය කරනු ලැබූ දෙයින් නුඹලා අනුභව නොකිරීමට නුඹලාට තිබෙන්නාවූ හේතුව කුමක්ද? තවද සැබැවින්ම බොහෝ දෙනෙක් නොදැනුවත්කමේ හේතුවෙන් සිය දුෂ්ට අභිලාෂයන් මගින් (අන් අයව) නොමඟ යවති. නිසැකවම ඔබගේ අධිපතියාණන් සීමාව ඉක්මවන්නන් පිළිබඳව වඩාත් හොඳින් දන්නේය.

وَذَرُوا۟ ظَٰهِرَ ٱلْإِثْمِ وَبَاطِنَهُۥٓ ۚ إِنَّ ٱلَّذِينَ يَكْسِبُونَ ٱلْإِثْمَ سَيُجْزَوْنَ بِمَا كَانُوا۟ يَقْتَرِفُونَ ١٢١

121. බාහිර මෙන්ම සැඟවුනු පාපයෙන් ඉවත් වී සිටිනු. නියතවශයෙන්ම පාපය උපයන්නන්හට ඔවුන් උපයා ඇති දේ සඳහා විපාක දෙනු ලබන්නේය.

وَلَا تَأْكُلُوا۟ مِمَّا لَمْ يُذْكَرِ ٱسْمُ ٱللَّهِ عَلَيْهِ وَإِنَّهُۥ لَفِسْقٌ ۗ وَإِنَّ ٱلشَّيَٰطِينَ لَيُوحُونَ إِلَىٰٓ أَوْلِيَآئِهِمْ لِيُجَٰدِلُوكُمْ ۖ وَإِنْ أَطَعْتُمُوهُمْ إِنَّكُمْ لَمُشْرِكُونَ ١٢٢

122. තවද අල්ලාහ්ගේ නාමය ආමන්ත්‍රණය නොකරනු ලැබූ දේ අනුභව නොකරනු. එය නියතවශයෙන්ම අකීකරු වීමකි. තවද සැබැවින්ම දුෂ්ටයින් සිය මිතුරන්ව පොළඹවන්නේ ඔවුන් නුඹලා සමග ආරවුල් ඇති කිරීමටය. තවද නුඹලා ඔවුනට අවනත වන්නේ නම් සැබැවින්ම නුඹලා (දෙවියන්ට) සමානයන් තබන්නන් වන්නෙහුය.

أَوَمَن كَانَ مَيْتًا فَأَحْيَيْنَٰهُ وَجَعَلْنَا لَهُۥ نُورًا يَمْشِى بِهِۦ فِى ٱلنَّاسِ كَمَن مَّثَلُهُۥ فِى ٱلظُّلُمَٰتِ لَيْسَ بِخَارِجٍ مِّنْهَا ۚ كَذَٰلِكَ

123. යමෙක් මරණයට පත් වී සිටියදී ඔහුට අප ජීවය ලබාදී තවද ඔහු සඳහා ආලෝකයක් ඇති කර එමගින් ඔහු මිනිසුන් අතර ගැවසෙන්නේද, (ඔහු) ඝණ අඳුරෙහි සිට එයින් එළියට ඒමට නොහැකි තත්ත්වයේ පසු වන තැනැත්තා මෙන් විය හැකිද? මේ ආකාරයට

زُيِّنَ لِلْكَٰفِرِينَ مَا كَانُوا۟ يَعْمَلُونَ ١٢٣

අවිශ්වාසිතයින්ගේ ක්‍රියාවන් ඔවුන්ට අලංකාර (ලෙස පෙනෙන්නට) කරවන ලදි.

وَكَذَٰلِكَ جَعَلْنَا فِى كُلِّ قَرْيَةٍ أَكَٰبِرَ مُجْرِمِيهَا لِيَمْكُرُوا۟ فِيهَا ۖ وَمَا يَمْكُرُونَ إِلَّا بِأَنفُسِهِمْ وَمَا يَشْعُرُونَ ١٢٤

*124. තවද මේ ආකාරයට අපි සෑම නගරයකම එහි පාපිෂ්ඨයින්ගේ නායකයින්ව (සත්‍යයට එරෙහිව) කුමන්ත්‍රණය කිරීමට ඉඩ සැලැස්වීමු. තවද ඔවුහු තමන්ගේ ආත්මයන්ටම මිස කුමන්ත්‍රණය නොකරති. එහෙත් ඔවුහු එය වටහා නොගනිති.

وَإِذَا جَآءَتْهُمْ ءَايَةٌ قَالُوا۟ لَن نُّؤْمِنَ حَتَّىٰ نُؤْتَىٰ مِثْلَ مَآ أُوتِىَ رُسُلُ ٱللَّهِ ۘ ٱللَّهُ أَعْلَمُ حَيْثُ يَجْعَلُ رِسَالَتَهُۥ ۗ سَيُصِيبُ ٱلَّذِينَ أَجْرَمُوا۟ صَغَارٌ عِندَ ٱللَّهِ وَعَذَابٌ شَدِيدٌۢ بِمَا كَانُوا۟ يَمْكُرُونَ ١٢٥

125. තවද ඔවුන් වෙත සලකුණක් පැමිණෙන විට 'අල්ලාහ්ගේ දූතයින් වෙත දෙනු ලැබූ දෙයට සමාන දෙයක් අපට ද දෙනු ලබන තුරු අපි විශ්වාස නොකරන්නෙමු'යි ඔවුහු කියති. සිය දූත පණිවිඩය කොහේ තැබිය යුත්තේ දැයි අල්ලාහ් මැනැවින් දනී. නියතවශයෙන්ම වැරදි කරන්නන්ට තමන් කරමින් සිටින කුමන්ත්‍රණය හේතුවෙන් අල්ලාහ් ඉදිරියෙහි අවමානය හා දැඩි දඬුවම අත්වනු ඇත.

فَمَن يُرِدِ ٱللَّهُ أَن يَهْدِيَهُۥ يَشْرَحْ صَدْرَهُۥ لِلْإِسْلَٰمِ ۖ وَمَن يُرِدْ أَن يُضِلَّهُۥ يَجْعَلْ صَدْرَهُۥ ضَيِّقًا حَرَجًا كَأَنَّمَا يَصَّعَّدُ فِى ٱلسَّمَآءِ ۚ كَذَٰلِكَ يَجْعَلُ ٱللَّهُ ٱلرِّجْسَ عَلَى ٱلَّذِينَ لَا يُؤْمِنُونَ ١٢٦

*126. එබැවින් කවරෙකුට හෝ අල්ලාහ් මග පෙන්වීමට කැමති වන්නේද ඔහුගේ හදවත ඉස්ලාමය (පිළිගැනීම) සඳහා ඔහු විවෘත කරන්නේය. තවද ඔහු යමෙකුව නොමඟ යවන්නට කැමති වන්නේද ඔහුගේ හදවත එය අධික බැවුමක් ඇති උසකට නගිනවාක් මෙන් ඔහු හකුළුවන්නේය. මේ ආකාරයට අල්ලාහ් විශ්වාස නොකරන අයහට දඬුවම් පමුණුවන්නේය.

*සටහන. 124: මෙහි 'අකාබිර මුජ්රිමීහා' ( أَكَٰبِرَ مُجْرِمِيهَا )යන පදයෙහි වචනාර්ථය වන්නේ 'එම නගරයෙහි පාපිෂ්ඨයින් අතර බලවතුන්ය.' මෙහි 'බලවතා' යන වචනය පාපයෙන් විශාල කොටසකට හිමිකම් කියන අය එමෙන්ම ඔවුන් අතුරෙහි නායකයින් ලෙස පෙනී සිටින අය විය හැකිය. නැතහොත් පාපිෂ්ඨ සමාජයේ බලවත් හා බලපුළුවන්කම් ඇති සාමාජිකයින් විය හැකිය.

*සටහන. 126: මෙහි 'සද්ර' ( صَدْرَ )යන වචනය හදවත ලෙස පරිවර්තනය කළ හැක. (අල් මුන්ජිද්- අරාබි ශබ්ද කෝෂය බලන්න)

وَهَٰذَا صِرَاطُ رَبِّكَ مُسْتَقِيمًا ۗ قَدْ فَصَّلْنَا
الْآيَاتِ لِقَوْمٍ يَذَّكَّرُونَ ﴿١٢٧﴾

127. තවද මෙය(ඔහු වෙතට යොමු කරන්නා වූ) ඔබගේ අධිපතියාණන්ගේ ඍජු මාර්ගය වේ. සැබැවින්ම දැනමුතුකම් ලබන්නාවූ ජනයාට අපි සලකුණු විස්තරාත්මකව පැහැදිලි කර ඇත්තෙමු.

لَهُمْ دَارُ السَّلَامِ عِندَ رَبِّهِمْ ۖ وَهُوَ وَلِيُّهُم
بِمَا كَانُوا يَعْمَلُونَ ﴿١٢٨﴾

128. ඔවුනට ඔවුන්ගේ අධිපතියාණන් වෙත සාමයේ වාසස්ථානය ඇත. තවද ඔවුන් කළදේ හේතුවෙන් ඔවුන්ගේ මිත්‍රයා ඔහු වේ.

وَيَوْمَ يَحْشُرُهُمْ جَمِيعًا يَا مَعْشَرَ الْجِنِّ
قَدِ اسْتَكْثَرْتُم مِّنَ الْإِنسِ ۖ وَقَالَ
أَوْلِيَاؤُهُم مِّنَ الْإِنسِ رَبَّنَا اسْتَمْتَعَ
بَعْضُنَا بِبَعْضٍ وَبَلَغْنَا أَجَلَنَا الَّذِي أَجَّلْتَ
لَنَا ۚ قَالَ النَّارُ مَثْوَاكُمْ خَالِدِينَ فِيهَا إِلَّا
مَا شَاءَ اللَّهُ ۗ إِنَّ رَبَّكَ حَكِيمٌ عَلِيمٌ ﴿١٢٩﴾

129. තවද එම දිනයේ ඔවුන් සියල්ලන්ව ඔහු එක්රැස් කරන විට, (ඔහු) 'එම්බල පිින් සමූහයිනි!, නුඹලා මිනිසුන් අතුරින් බොහෝ දෙනෙකුව (නුඹලාට යටහත්වීම සඳහා) ලබාගත්තෙහුයැ.'(යි පවසන්නේය). තවද මිනිසුන් අතුරින් ඔවුන්ගේ මිතුරෝ 'අප අධිපතියාණනි!, අපි එකිනෙකාගෙන් ප්‍රයෝජන ලදිමු. එහෙත් ඔබ අපට නියම කළ අපගේ කාලසීමාව කරා අපි (දැන්) ළඟා වී ඇත්තෙමු'යි පවසන්නෝය. 'ගින්න නුඹලාගේ වාසස්ථානයයි. අල්ලාහ් අභිමත කරන දේ හැර නුඹලා එහි වෙසෙන්නෝයැ'යි ඔහු පවසන්නේය. සැබැවින්ම, ඔබගේ අධිපතියාණන් ප්‍රඥාසම්පන්නය, සියල්ල දත්තාය.

وَكَذَٰلِكَ نُوَلِّي بَعْضَ الظَّالِمِينَ بَعْضًا
بِمَا كَانُوا يَكْسِبُونَ ﴿١٣٠﴾

130. තවද අපි මේ අන්දමින් වරදකරුවන්ගෙන් ඇතැමෙකුව ඇතැමුන්ට ඔවුන් ඉපැයූ දේ හේතුවෙන් ඉහළින් සිටීමට සැලැස්වීමු.

يَا مَعْشَرَ الْجِنِّ وَالْإِنسِ أَلَمْ يَأْتِكُمْ
رُسُلٌ مِّنكُمْ يَقُصُّونَ عَلَيْكُمْ آيَاتِي
وَيُنذِرُونَكُمْ لِقَاءَ يَوْمِكُمْ هَٰذَا ۚ قَالُوا
شَهِدْنَا عَلَىٰ أَنفُسِنَا ۖ وَغَرَّتْهُمُ الْحَيَاةُ الدُّنْيَا

131. 'එම්බල පිින් හා මනුෂ්‍ය සමූහයිනි! මාගේ සලකුණු නුඹලාට කියාදුන්නා වූද, නුඹලාගේ මෙදින හමුව පිළිබඳව නුඹලාට අවවාද කළා වූද නුඹලා අතුරෙන්ම දූතයින් නුඹලා වෙත නොපැමිණියේද?'. ඔවුහු 'අපි අපටම එරෙහිව සාක්ෂි දරමු'යි කියන්නෝය. තවද ලෞකික ජීවිතය ඔවුන්ව මුළා කළේය. තවද ඔවුන්

අවිශ්වාසිතයින් වූ බවට ඔවුහු තමන්ටම එරෙහිව සාක්ෂි දරති.

وَشَهِدُوْا عَلٰٓى اَنْفُسِهِمْ اَنَّهُمْ كَانُوْا كٰفِرِيْنَ ﴿١٣١﴾

132. ඒ මක්නිසාදයත් ඔබගේ අධිපතියාණන් නගරයන්, එහි ජනතාව අවවාද නොකරනු ලැබ සිටියදී අයුක්ති ලෙස විනාශයට පත් නොකරන්නෙක්ය.

ذٰلِكَ اَنْ لَّمْ يَكُنْ رَّبُّكَ مُهْلِكَ الْقُرٰى بِظُلْمٍ وَّاَهْلُهَا غٰفِلُوْنَ ﴿١٣٢﴾

133. තවද සෑම කෙනෙකුටම ඔවුන් කරන දේ අනුව තරාතිරම් ඇත. තවද ඔබගේ අධිපතියාණන් ඔවුන් කරන දේ පිළිබඳව නොසැලකිලිමත් නොවේ.

وَلِكُلٍّ دَرَجٰتٌ مِّمَّا عَمِلُوْا ؕ وَمَا رَبُّكَ بِغَافِلٍ عَمَّا يَعْمَلُوْنَ ﴿١٣٣﴾

134. තවද ඔබගේ අධිපතියාණන් ස්වයංපෝෂිතය, අතිශයින්ම කරුණාවන්තය. ඔහු අභිමත වූයේ නම් ඔහු නුඹලාව ඉවත් කර අන් ජනතාවගේ පරපුරින් ඔහු නුඹලාව ඇති කළාක් මෙන් ඔහු අභිමත අයව නුඹලා වෙනුවට නියෝජනය කිරීමට සලස්වන්නේය.

وَرَبُّكَ الْغَنِيُّ ذُو الرَّحْمَةِ ؕ اِنْ يَّشَاْ يُذْهِبْكُمْ وَيَسْتَخْلِفْ مِنْۢ بَعْدِكُمْ مَّا يَشَآءُ كَمَآ اَنْشَاَكُمْ مِّنْ ذُرِّيَّةِ قَوْمٍ اٰخَرِيْنَ ﴿١٣٤﴾

135. නුඹලාට පොරොන්දු වූ දේ ඒකාන්තයෙන්ම පැමිණේ. තවද (එය) පරාජය කිරීමට නුඹලාට හැකි නොවේ.

اِنَّ مَا تُوْعَدُوْنَ لَاٰتٍ ۙ وَّمَآ اَنْتُمْ بِمُعْجِزِيْنَ ﴿١٣٥﴾

136. පවසන්න, 'එම්බල මාගේ ජනතාවනි!, නුඹලාට හැකි උපරිමයෙන් ක්‍රියා කරනු, මම ද ක්‍රියා කරන්නෙමි. වාසස්ථානයේ අවසන් ඵලය කාහටදැයි නුඹලා ඉක්මනින්ම දැනගන්නාහුය.' නිසැකවම වරදකරුවන් ජය නොලබන්නෝය.

قُلْ يٰقَوْمِ اعْمَلُوْا عَلٰى مَكَانَتِكُمْ اِنِّيْ عَامِلٌ ۚ فَسَوْفَ تَعْلَمُوْنَ ۙ مَنْ تَكُوْنُ لَهٗ عَاقِبَةُ الدَّارِ ؕ اِنَّهٗ لَا يُفْلِحُ الظّٰلِمُوْنَ ﴿١٣٦﴾

137. තවද ඔහු උත්පාදනය කර ඇති අස්වැන්නෙන් සහ ගවසතුන්ගෙන් කොටසක් ඔවුන් අල්ලාහ් වෙනුවෙන් වෙන්කොට, ඔවුන් මනඃකල්පිත කරන පරිදි 'මෙය අල්ලාහ්ට යැ'යිද එමෙන්ම 'මෙය අපගේ ප්‍රතිමාවන්ට යැ'යි ද පවසති. නමුත් ඔවුන්ගේ ප්‍රතිමාවන් වෙනුවෙන් ඇති දේ අල්ලාහ් වෙත ළඟා නොවේ.

وَجَعَلُوْا لِلّٰهِ مِمَّا ذَرَاَ مِنَ الْحَرْثِ وَالْاَنْعَامِ نَصِيْبًا فَقَالُوْا هٰذَا لِلّٰهِ بِزَعْمِهِمْ وَهٰذَا لِشُرَكَآئِنَا ۚ فَمَا كَانَ لِشُرَكَآئِهِمْ فَلَا يَصِلُ اِلَى اللّٰهِ ۚ وَمَا كَانَ لِلّٰهِ فَهُوَ يَصِلُ

إِلَىٰ شُرَكَآئِهِمْ ۗ سَآءَ مَا يَحْكُمُونَ ١٣٧

එසේම අල්ලාහ් වෙනුවෙන් ඇති දේ ඔවුන්ගේ ප්‍රතිමාවන් වෙත ළඟා වේ. ඔවුන් තීරණය කරන දේ නපුරුය.

وَكَذَٰلِكَ زَيَّنَ لِكَثِيرٍ مِّنَ الْمُشْرِكِينَ
قَتْلَ اَوْلَادِهِمْ شُرَكَآؤُهُمْ لِيُرْدُوهُمْ
وَلِيَلْبِسُوا عَلَيْهِمْ دِينَهُمْ ۖ وَلَوْ شَآءَ اللَّهُ
مَا فَعَلُوهُ فَذَرْهُمْ وَمَا يَفْتَرُونَ ١٣٨

138. තවද මේ අන්දමින් ප්‍රතිමා පුදන්නන් ගෙන් බොහෝ අයට, ඒවා (ඔවුන් තැබූ සමානයන්) ඔවුන්ව විනාශ කිරීමටත් ඔවුන්ගේ ආගමෙහි ඔවුන්ට ව්‍යාකුලත්වයක් ඇති කිරීමටත් ඔවුන්ගේ දරුවන් ඝාතනය කිරීම අලංකාර ලෙස (පෙනෙන්නටත්) සැලැස්වීය. තවද අල්ලාහ්, ඔහුගේ අභිමතය (ක්‍රියාත්මක කර)ඇත්නම්, ඔවුන් මෙසේ නොකරනු ඇත. එබැවින් ඔවුන් ඇති කළ මිථ්‍යාවද සමග ඔවුන්ව හැර දමන්න.

وَقَالُوا هَٰذِهِۦٓ اَنْعَامٌ وَّحَرْثٌ حِجْرٌ ۖ لَّا
يَطْعَمُهَآ اِلَّا مَنْ نَّشَآءُ بِزَعْمِهِمْ
وَاَنْعَامٌ حُرِّمَتْ ظُهُورُهَا وَاَنْعَامٌ لَّا
يَذْكُرُونَ اسْمَ اللَّهِ عَلَيْهَا افْتِرَآءً عَلَيْهِ ۚ
سَيَجْزِيهِمْ بِمَا كَانُوا يَفْتَرُونَ ١٣٩

139. තවද 'ඒ ඒ ගවසතුන් සහ අස්වැන්නන් තහනම් කරනු ලැබ ඇතැයිද අප කැමති අය හැරෙන්නට අන් අය එයින් අනුභව නොකළ යුතු යැයි'ද ඔවුන් පවසති. තවද ඔහුට එරෙහිව බොරු ගොතමින් සමහර ගවසතුන්ගේ පිටකොඳු තහනම් කර ලැබ ඇතැයිද සමහර ගවසතුන් උන් මත අල්ලාහ්ගේ නාමය ඔවුන් ආමන්ත්‍රණය නොකරන බවද ඔවුන් නිදහසට කරුණු කියති. ඔවුන් බොරු ගොතා ඇති දේ සඳහා ඔහු ඔවුනට ඉක්මනින් විපාක දෙන්නේය.

وَقَالُوا مَا فِي بُطُونِ هَٰذِهِ الْاَنْعَامِ
خَالِصَةٌ لِّذُكُورِنَا وَمُحَرَّمٌ عَلَىٰٓ
اَزْوَاجِنَا ۖ وَاِنْ يَّكُنْ مَّيْتَةً فَهُمْ فِيهِ
شُرَكَآءُ ۚ سَيَجْزِيهِمْ وَصْفَهُمْ ۚ اِنَّهُ
حَكِيمٌ عَلِيمٌ ١٤٠

140. තවද 'ඒ ඒ ගවසතුන්ගේ ගර්භාෂයන්හි ඇති දේ අපගේ පුරුෂයින් සඳහා පමණක් (සීමා කර) ඇති අතර ඒවා අපගේ භාර්යයාවන් සඳහා තහනම් කොට ඇත. එහෙත් එය (උපතේදී) මැරී ඇත්නම් පසුව එයට ඔවුන් (සියල්ලන්ම) හවුල් කරුවන් වන්නේය'යි ඔවුහු පවසති. ඔවුන්ගේ (මිථ්‍යා) ප්‍රකාශය හේතුවෙන් ඔහු ඔවුන්ට විපාක දෙන්නේමය. නි යත ව ශ යෙ න් ම ඔ හු ප්‍රඥාසම්පන්නය, සියල්ල දන්නාය.

قَدْ خَسِرَ الَّذِينَ قَتَلُوٓا اَوْلَادَهُمْ سَفَهًا

141. ඇත්තෙන්ම පාඩු විඳින්නන් වන්නේ දැනුමෙන් තොරව සිය

بِغَيْرِ عِلْمٍ وَّحَرَّمُوْا مَا رَزَقَهُمُ اللّٰهُ افْتِرَآءً عَلَى اللّٰهِ ۗ قَدْ ضَلُّوْا وَمَا كَانُوْا مُهْتَدِيْنَ ﴿١٤١﴾

දරුවන්ව මෝඩ කමින් ඝාතනය කර, අල්ලාහ්ට එරෙහිව බොරු ගොතමින් අල්ලාහ් ඔවුන්ට ලබා දුන් දේ අනිත්‍යානුකුල කරගත් අයමය. ඇත්තෙන්ම ඔවුහු නොමග ගිය අතර යහමග නොලද්දෝ වෙති.

وَهُوَ الَّذِيْٓ اَنْشَاَ جَنّٰتٍ مَّعْرُوْشٰتٍ وَّغَيْرَ مَعْرُوْشٰتٍ وَّالنَّخْلَ وَالزَّرْعَ مُخْتَلِفًا اُكُلُهٗ وَالزَّيْتُوْنَ وَالرُّمَّانَ مُتَشَابِهًا وَّغَيْرَ مُتَشَابِهٍ ۗ كُلُوْا مِنْ ثَمَرِهٖٓ اِذَآ اَثْمَرَ وَاٰتُوْا حَقَّهٗ يَوْمَ حَصَادِهٖ ۖ وَلَا تُسْرِفُوْا ۗ اِنَّهٗ لَا يُحِبُّ الْمُسْرِفِيْنَ ﴿١٤٢﴾

142. තවද ගරාදි සහිත සහ ගරාදි රහිත උද්‍යානයන්ද, රටඉඳි ගස් ද, විවිධ වර්ගයෙන් යුත් පලදාවන් සහිත කෙත් ද, එමෙන්ම සමාන හා අසමාන වූ ඔලිව් සහ දෙළුම්ද ඇති කළේ ඔහුමය. එය එලදරණ විට එකිනෙකින් එල අනුභව කරනු. එහෙත් අස්වැන්න නෙළන දිනයේදී ඔහුට දිය යුතු දේ දෙනු. තවද සීමාවන් නොඉක්මවනු. ඇත්තෙන්ම අල්ලාහ් සීමාවන් ඉක්මවන්නන්ව ප්‍රිය නොකරන්නේය.

وَمِنَ الْاَنْعَامِ حَمُوْلَةً وَّفَرْشًا ۗ كُلُوْا مِمَّا رَزَقَكُمُ اللّٰهُ وَلَا تَتَّبِعُوْا خُطُوٰتِ الشَّيْطٰنِ ۗ اِنَّهٗ لَكُمْ عَدُوٌّ مُّبِيْنٌ ﴿١٤٣﴾

143. තවද ගවසතුන්ගෙන් (සමහරුන්) බර ඉසිලීම සඳහාද, (සමහරුන්) ගමන් බිමන් සඳහාද (ඔහු මවා) ඇත. අල්ලාහ් නුඹලාට ලබා දුන් දෙයින් අනුභව කරනු. තවද ෂෛයිතාන්ගේ අඩිපාර අනුගමනය නොකරනු. ඇත්තෙන්ම ඔහු නුඹලාට ප්‍රකට සතුරාය.

ثَمٰنِيَةَ اَزْوَاجٍ ۚ مِنَ الضَّاْنِ اثْنَيْنِ وَمِنَ الْمَعْزِ اثْنَيْنِ ۗ قُلْ ءٰٓالذَّكَرَيْنِ حَرَّمَ اَمِ الْاُنْثَيَيْنِ اَمَّا اشْتَمَلَتْ عَلَيْهِ اَرْحَامُ الْاُنْثَيَيْنِ ۗ نَبِّئُوْنِيْ بِعِلْمٍ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿١٤٤﴾

144. තවද (ඔහු ගවසතුන්ගෙන්) ජෝඩු අටක්, බැටළුවන්ගෙන් දෙදෙනෙක් හා එළුවන්ගෙන් දෙදෙනෙක් (සහිතව මවා ඇත්තේ)ය. පවසන්න. 'ඔහු තහනම් කර ඇත්තේ පිරිමි සතුන් දෙදෙනාද නැතහොත් ගැහැනු සතුන් දෙදෙනාද නැතහොත් ඒ ගැහැනු සතුන් දෙදෙනාගේ ගර්භාෂයන්හි ඇති දේද? නුඹලා සත්‍යවාදීන් වේ නම් දැනුමෙන් යුතුව මට දන්වනු'.

وَمِنَ الْاِبِلِ اثْنَيْنِ وَمِنَ الْبَقَرِ اثْنَيْنِ ۗ قُلْ

145. තවද ඔටුවන්ගෙන් දෙදෙනෙක්ද ගවයන්ගෙන්

ءٰٓالذَّكَرَيۡنِ حَرَّمَ اَمِ الۡاُنۡثَيَيۡنِ اَمَّا اشۡتَمَلَتۡ عَلَيۡهِ اَرۡحَامُ الۡاُنۡثَيَيۡنِ ؕ اَمۡ كُنۡتُمۡ شُهَدَآءَ اِذۡ وَصّٰىكُمُ اللّٰهُ بِهٰذَا ۚ فَمَنۡ اَظۡلَمُ مِمَّنِ افۡتَرٰى عَلَى اللّٰهِ كَذِبًا لِّيُضِلَّ النَّاسَ بِغَيۡرِ عِلۡمٍ ؕ اِنَّ اللّٰهَ لَا يَهۡدِى الۡقَوۡمَ الظّٰلِمِيۡنَ ﴿١٤٥﴾

දෙදෙනෙක්ද වේ. පවසන්න, 'ඔහු තහනම් කර ඇත්තේ පිරිමි සතුන් දෙදෙනාද නැතහොත් ගැහැනු සතුන් දෙදෙනාද නැතහොත් ඒ ගැහැනු සතුන් දෙදෙනාගේ ගර්භාෂයන්හි ඇති දේද? අල්ලාහ් මෙය නුඹලාට නියෝග කළ විට නුඹලා සිටියෙහුද?' දැනුමෙන් තොරව මිනිසුන්ව නොමග යැවීම සඳහා අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නාට වඩා අදමිටුවා කවරේද? නියතවශයෙන්ම අදමිටු ජනතාවට අල්ලාහ් මග නොපෙන්වයි.

قُلۡ لَّاۤ اَجِدُ فِىۡ مَاۤ اُوۡحِىَ اِلَىَّ مُحَرَّمًا عَلٰى طَاعِمٍ يَّطۡعَمُهٗۤ اِلَّاۤ اَنۡ يَّكُوۡنَ مَيۡتَةً اَوۡ دَمًا مَّسۡفُوۡحًا اَوۡ لَحۡمَ خِنۡزِيۡرٍ فَاِنَّهٗ رِجۡسٌ اَوۡ فِسۡقًا اُهِلَّ لِغَيۡرِ اللّٰهِ بِهٖ ۚ فَمَنِ اضۡطُرَّ غَيۡرَ بَاغٍ وَّلَا عَادٍ فَاِنَّ رَبَّكَ غَفُوۡرٌ رَّحِيۡمٌ ﴿١٤٦﴾

* 146. පවසන්න, 'යමක් (ප්‍රිය කර) අනුභව කරන්නාට ඉබේම මියගිය දේද, වැගිරුණු ලේද, සූකර මාංශද, හැරෙන්නට වෙනත් දෙයක් කෑමට තහනම් කරනලද බව මා හට අනාවරණය කරනු ලැබූ දැයෙහි මා නොදුටුවෙමි. මක්නිසාදයත් එය (සියල්ලම) අපිරිසිදුය. නැතහොත් අල්ලාහ් හැර වෙනත් නමක් යදිනු ලැබූ දේ පිළිකුල්ය. එහෙත් යමෙක් අවනත නොවන්නෙකුද සීමාව ඉක්මවන්නෙකුද නොවෙමින් දැඩි අවශ්‍යතාවයකින් පෙළෙනු ලැබුවහොත්, නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය'.

وَعَلَى الَّذِيۡنَ هَادُوۡا حَرَّمۡنَا كُلَّ ذِىۡ ظُفُرٍ ۚ وَمِنَ الۡبَقَرِ وَالۡغَنَمِ حَرَّمۡنَا عَلَيۡهِمۡ شُحُوۡمَهُمَاۤ اِلَّا مَا حَمَلَتۡ ظُهُوۡرُهُمَاۤ اَوِ الۡحَوَايَاۤ اَوۡ مَا اخۡتَلَطَ بِعَظۡمٍ ؕ ذٰلِكَ جَزَيۡنٰهُمۡ بِبَغۡيِهِمۡ ۖ وَاِنَّا لَصٰدِقُوۡنَ ﴿١٤٧﴾

147. තවද අපි නිය ඇති සියලු සතුන් යුදෙව්වන්ට තහනම් කළෙමු. තවද ගවයන්ගේද, බැටළුවන් හා එළුවන්ගේද අපි උන්ගේ මේදයන් ඔවුන්ට තහනම් කළෙමු. එය උන්ගේ පිටකොඳුද, බඩවැල්ද, ඇටකටු සමඟ මිශ්‍රවී ඇති දේ හැරය. මෙය ඔවුන්ගේ කැරළිකාරබව හේතුවෙන් අපි ඔවුනට දුන් විපාකය වේ. තවද නියතවශයෙන්ම අපි සත්‍යවාදින්ම වන්නෙමු.

* සටහන. 146: 'ඉස්තුර්ර' (اِضْطُرَّ) යන්නෙහි අර්ථය වනුයේ කුස ගින්නෙන් සහ ආහාර හිඟය හේතුවෙන් යමෙකුගේ පිඩනය දරා ගැනීමේ ශක්තිය අභිබවා බලපෑමකට ලක්වීමයි.

148. නමුත් ඔවුන් ඔබව මුසාවාදියෙකු යැයි චෝදනා කරන්නේ නම්, පවසන්න, 'නුඹලාගේ අධිපතියාණන් ව්‍යාප්ත වන්නා වූ දයාවේ හිමියාය. තවද ඔහුගේ කෝපය වැරදිකාර ජනයාගෙන් ඉවත් නොකරනු ලබන්නේය'.

فَإِنْ كَذَّبُوكَ فَقُلْ رَّبُّكُمْ ذُو رَحْمَةٍ وَّاسِعَةٍ ۚ وَلَا يُرَدُّ بَأْسُهُ عَنِ الْقَوْمِ الْمُجْرِمِينَ ﴿١٤٨﴾

149. 'අල්ලාහ් කැමති වුයේ නම් අපි ඔහු සමග දෙවිවරුන් සම්බන්ධ නොකරන්නට තිබුණි, අපගේ පියවරුන්ද නොකරන්නට තිබුණි, අපිද කිසිවක් අනිත්‍යානුකූල නොකරන්නට තිබුණි'යි අල්ලාහ්ට සමාන තබන්නන් පවසන්නෝය. මේ අන්දමින් ඔවුන් අපගේ කෝපය අත් විඳිනතුරු ඔවුනට පෙර සිටි අයත් (අල්ලාහ්ගේ දූතයින්ව) මුසාවාදීන් ලෙස චෝදනා කළහ. පවසන්න, 'නුඹලාට යම් දැනුමක් තිබේද? එසේනම් එය අපවෙත ඉදිරිපත් කරනු. හුදෙක් අනුමානය හැර නුඹලා වෙනත් කිසිවක් අනුගමනය නොකරන්නෙහුය. තවද බොරුව මිස නුඹලා අන් කිසිවක් නොකරන්නෙහුය'.

سَيَقُولُ الَّذِينَ أَشْرَكُوا لَوْ شَاءَ اللَّهُ مَا أَشْرَكْنَا وَلَا آبَاؤُنَا وَلَا حَرَّمْنَا مِنْ شَيْءٍ ۚ كَذَٰلِكَ كَذَّبَ الَّذِينَ مِنْ قَبْلِهِمْ حَتَّىٰ ذَاقُوا بَأْسَنَا ۗ قُلْ هَلْ عِنْدَكُمْ مِّنْ عِلْمٍ فَتُخْرِجُوهُ لَنَا ۖ إِنْ تَتَّبِعُونَ إِلَّا الظَّنَّ وَإِنْ أَنْتُمْ إِلَّا تَخْرُصُونَ ﴿١٤٩﴾

150. පවසන්න, 'තීරණාත්මක තර්කය අල්ලාහ් සතුය. ඔහුගේ අභිමතය ඔහු (ක්‍රියාත්මක)කළේ නම් ඔහු ඇත්තෙන්ම නුඹලා සියල්ලන්ව යහමගට යොමු කරන්නට තිබුණි'.

قُلْ فَلِلَّهِ الْحُجَّةُ الْبَالِغَةُ ۖ فَلَوْ شَاءَ لَهَدَاكُمْ أَجْمَعِينَ ﴿١٥٠﴾

151. පවසන්න, 'අල්ලාහ් මෙය තහනම් කර ඇතැයි සහතික කරන නුඹලාගේ සාක්ෂිකරුවන් ඉදිරිපත් කරනු'. ඔවුන් සාක්ෂි දරන්නේ නම් ඔබ ඔවුන් සමග සාක්ෂි නොදරන්න. අපගේ සලකුණු බොරු ලෙස සලකන්නාවූ අයගේද, පරලොව ගැන විශ්වාස නොකරන්නාවූ අයගේද, දුෂ්ට අභිලාෂයන් අනුගමනය නොකරන්න. තවද මොවුන්ම තමන්ගේ අධිපතියාණන්ට සමානයන් තබති.

قُلْ هَلُمَّ شُهَدَاءَكُمُ الَّذِينَ يَشْهَدُونَ أَنَّ اللَّهَ حَرَّمَ هَٰذَا ۖ فَإِنْ شَهِدُوا فَلَا تَشْهَدْ مَعَهُمْ ۚ وَلَا تَتَّبِعْ أَهْوَاءَ الَّذِينَ كَذَّبُوا بِآيَاتِنَا وَالَّذِينَ لَا يُؤْمِنُونَ بِالْآخِرَةِ وَهُمْ بِرَبِّهِمْ يَعْدِلُونَ ﴿١٥١﴾ ع

152. පවසන්න. 'එනු, නුඹලාගේ අධිපතියාණන් වැළැක්වූ දේ ගැන

قُلْ تَعَالَوْا أَتْلُ مَا حَرَّمَ رَبُّكُمْ عَلَيْكُمْ

مම නුඹලාට කියා පාන්නෙමි. එනම් නුඹලා ඔහු සමග කිසිදෙයකින් සමානයන් නොතබනු. තවද නුඹලා දෙමව්පියන්ට අසීමිත කරුණාවෙන් සලකනු. තවද නුඹලා දිළිඳුකම (හි බිය) නිසා නුඹලාගේ දරුවන්ව ඝාතනය නොකරනු. නුඹලාටත්, ඔවුන්ටත් ජීවනෝපාය සපයන්නේ අපිමය. තවද නුඹලා පිළිකුල් ක්‍රියාවන් වෙත එය විවෘත වුද, එය රහසිගත වුද ළඟා නොවනු. තවද අල්ලාහ් තහනම් කර ඇති ප්‍රාණයන් අවසරයෙන් තොරව ඝාතනය නොකරනු. නුඹලා තේරුම් ගනු පිණිස ඔහු නුඹලාට මේ පිළිබඳව නියෝග කර ඇත'.

أَلَّا تُشْرِكُوا بِهِۦ شَيْـًٔا ۖ وَبِالْوَٰلِدَيْنِ إِحْسَٰنًا ۖ وَلَا تَقْتُلُوٓا أَوْلَٰدَكُم مِّنْ إِمْلَٰقٍ ۖ نَّحْنُ نَرْزُقُكُمْ وَإِيَّاهُمْ ۖ وَلَا تَقْرَبُوا الْفَوَٰحِشَ مَا ظَهَرَ مِنْهَا وَمَا بَطَنَ ۖ وَلَا تَقْتُلُوا النَّفْسَ الَّتِى حَرَّمَ اللَّهُ إِلَّا بِالْحَقِّ ۚ ذَٰلِكُمْ وَصَّىٰكُم بِهِۦ لَعَلَّكُمْ تَعْقِلُونَ ﴿١٥٢﴾

153. තවද 'අනාථයාගේ දේපළ වෙත ඔහු තම වැඩි වියට එළඹෙන තුරු ඉතා යහපත් අයුරින් මිස ළං නොවනු. තවද මිනුම් හා කිරුම් සාධාරණත්වයෙන් යුතුව සම්පූර්ණයෙන් දෙනු. අපි කිසිදු ආත්මයකට එහි ශක්තියට බැහැරව වගකීම් නොපවරන්නෙමු. තවද නුඹලා කථා කරන විට (එම තැනැත්තා) ඥාතියෙකු වුවද, යුක්ති සහගත වනු. තවද අල්ලාහ්ගේ පොරොන්දුව ඉටු කරනු. නුඹලා සිහියට ගනු පිණිස ඔහු නුඹලාට මේ පිළිබඳව නියෝග කරයි'.

وَلَا تَقْرَبُوا مَالَ الْيَتِيمِ إِلَّا بِالَّتِى هِىَ أَحْسَنُ حَتَّىٰ يَبْلُغَ أَشُدَّهُۥ ۖ وَأَوْفُوا الْكَيْلَ وَالْمِيزَانَ بِالْقِسْطِ ۖ لَا نُكَلِّفُ نَفْسًا إِلَّا وُسْعَهَا ۖ وَإِذَا قُلْتُمْ فَاعْدِلُوا وَلَوْ كَانَ ذَا قُرْبَىٰ ۖ وَبِعَهْدِ اللَّهِ أَوْفُوا ۚ ذَٰلِكُمْ وَصَّىٰكُم بِهِۦ لَعَلَّكُمْ تَذَكَّرُونَ ﴿١٥٣﴾

154. තවද (පවසන්න) 'මෙයම මාගේ ඍජු (දෙසට යොමු කරන) මාර්ගය වේ. එබැවින් එය අනුගමනය කරනු. තවද (අනෙකුත්) මාර්ගයන් අනුගමනය නොකරනු. එසේ නොවුණහොත් ඒවා ඔහුගේ මාර්ගයෙන් නුඹලාව ඉවත් කරන්නේය. (නපුරන්ට එරෙහිව) නුඹලා ආරක්ෂා වීමට (හැකි වනු පිණිස) ඔහු නුඹලාට මේ පිළිබඳව නියෝග කරයි'.

وَأَنَّ هَٰذَا صِرَٰطِى مُسْتَقِيمًا فَاتَّبِعُوهُ ۖ وَلَا تَتَّبِعُوا السُّبُلَ فَتَفَرَّقَ بِكُمْ عَن سَبِيلِهِۦ ۚ ذَٰلِكُمْ وَصَّىٰكُم بِهِۦ لَعَلَّكُمْ تَتَّقُونَ ﴿١٥٤﴾

155. පසුව කුසල් ක්‍රියාවෙහි විශිෂ්ටත්වයක් ඇති අයගේ අවශ්‍යතාවයන් සම්පූර්ණයෙන්ම ඉටු

ثُمَّ ءَاتَيْنَا مُوسَى الْكِتَٰبَ تَمَامًا عَلَى الَّذِىٓ

أَحْسَنَ وَتَفْصِيلًا لِّكُلِّ شَيْءٍ وَهُدًى وَرَحْمَةً لَّعَلَّهُم بِلِقَاءِ رَبِّهِمْ يُؤْمِنُونَ ﴿١٥٥﴾

කරන්නාවූද, සියලුම විස්තරයන් පහදන්නාවූද, මග පෙන්වීමක් ලෙසද, ආශිර්වාදයක් ලෙසද අපි මූසාට පුස්තකයක් දුනිමු. එබැවින් මෙය සිය අධිපතියාණන්ගේ හමුවීම කෙරෙහි ඔවුන් විශ්වාස කරනු පිණිසය.

وَهَٰذَا كِتَابٌ أَنزَلْنَاهُ مُبَارَكٌ فَاتَّبِعُوهُ وَاتَّقُوا لَعَلَّكُمْ تُرْحَمُونَ ﴿١٥٦﴾

156. තවද මෙය අප පහළ කර ඇති ග්‍රන්ථයකි. (එය) ආශිර්වාදයෙන් පිරුණු එකකි. එබැවින් එය අනුගමනය කරනු. නුඹලාට දයාව දක්වනු පිණිස (පාපයට) එරෙහිව ආරක්ෂා කරගනු.

أَن تَقُولُوا إِنَّمَا أُنزِلَ الْكِتَابُ عَلَىٰ طَائِفَتَيْنِ مِن قَبْلِنَا وَإِن كُنَّا عَن دِرَاسَتِهِمْ لَغَافِلِينَ ﴿١٥٧﴾

157. අපට පෙර ජන කොටස් දෙකකට පමණක් පුස්තකය පහළ කරනු ලැබූ බවත්, නිසැකවම ඔවුන්ගේ ඉගැනුම ගැන අප නොදැනුවත්ව සිටි බවත්, නුඹලා නොකියනු පිණිසය.

أَوْ تَقُولُوا لَوْ أَنَّا أُنزِلَ عَلَيْنَا الْكِتَابُ لَكُنَّا أَهْدَىٰ مِنْهُمْ ۚ فَقَدْ جَاءَكُم بَيِّنَةٌ مِّن رَّبِّكُمْ وَهُدًى وَرَحْمَةٌ ۚ فَمَنْ أَظْلَمُ مِمَّن كَذَّبَ بِآيَاتِ اللَّهِ وَصَدَفَ عَنْهَا ۗ سَنَجْزِي الَّذِينَ يَصْدِفُونَ عَنْ آيَاتِنَا سُوءَ الْعَذَابِ بِمَا كَانُوا يَصْدِفُونَ ﴿١٥٨﴾

158. 'නැතහොත් අප වෙත පුස්තකය පහළ කරන ලද්දේ නම්, ඇත්තෙන්ම ඔවුන්ට වඩා හොඳින් අප යහමග ලබන්නට තිබිණි' යි නුඹලා නොකියා සිටීම පිණිසත් (අප මෙම කුර්ආන් ග්‍රන්ථය එවා ඇත්තෙමු) එබැවින් නුඹලාගේ අධිපතියාණන් වෙතින් නුඹලාට පැහැදිලි සාක්ෂියක්ද, මඟපෙන්වීමක් මෙන්ම කරුණාවද පැමිණ ඇත. එබැවින් අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කර ඒවායෙන් හැරී යන්නාට වඩා අදමිටුවා කවරෙක්ද? එහෙයින් අල්ලාහ්ගේ වදන් බොරු කරමින් ඒ (අල්ලාහ්ගේ වදන් විශ්වාස කිරීම) කෙරෙහි ඉවතලන්නන් හට ඔවුන් ඉවත යෑමේ හේතුවෙන් සත්තකින්ම අපි නපුරු දඬුවම් ප්‍රතිවිපාක වශයෙන් දෙන්නෙමු.

هَلْ يَنظُرُونَ إِلَّا أَن تَأْتِيَهُمُ الْمَلَائِكَةُ أَوْ

159. තමන් වෙත සුරදූතයින් පැමිණිය යුතු යැයිද, නැතහොත්

ඔබගේ අධිපතියාණන් පැමිණිය යුතු යැයිද නැතහොත් ඔබගේ අධිපතියාණන්ගේ ඇතැම් සළකුණු පැමිණිය යුතු යැයි ඔවුන් අපේක්ෂා කරන්නේද? ඔබගේ අධිපතියාණන්ගේ ඇතැම් සළකුණු පැමිණෙන දිනකදී ඒ කෙරෙහි විශ්වාස කිරීම කිසිඳු ආත්මයකට ඵලක් නොවන්නේය. මන්ද එයට පෙර විශ්වාස කිරීම හෝ එම විශ්වාසයෙන් කිසිඳු යහපතක් ලැබුවේද නැත. පවසන්න, 'නුඹලා බලා සිටිනු. ඇත්තෙන්ම අපිත් බලා සිටින්නන් වෙමු'.

يَأْتِيَ رَبُّكَ أَوْ يَأْتِيَ بَعْضُ آيَاتِ رَبِّكَ ۗ يَوْمَ يَأْتِي بَعْضُ آيَاتِ رَبِّكَ لَا يَنْفَعُ نَفْسًا إِيمَانُهَا لَمْ تَكُنْ آمَنَتْ مِنْ قَبْلُ أَوْ كَسَبَتْ فِي إِيمَانِهَا خَيْرًا ۗ قُلِ انْتَظِرُوا إِنَّا مُنْتَظِرُونَ ﴿١٥٩﴾

160. සිය ආගම වික්ෂිප්ත කරමින්, විවිධ නිකායයන් බවට පත් කළ අය සමඟ ඔබට කිසිඳු සම්බන්ධයක් නොමැත. ඇත්තෙන්ම ඔවුන් පිළිබඳව තීරණය ගැනීම අල්ලාහ්ගේ වගකීමකි. පසුව ඔවුන් කරමින් සිටි දේ ගැන ඔහු ඔවුන්ට දැනුම් දෙන්නේය.

إِنَّ الَّذِينَ فَرَّقُوا دِينَهُمْ وَكَانُوا شِيَعًا لَسْتَ مِنْهُمْ فِي شَيْءٍ ۚ إِنَّمَا أَمْرُهُمْ إِلَى اللَّهِ ثُمَّ يُنَبِّئُهُمْ بِمَا كَانُوا يَفْعَلُونَ ﴿١٦٠﴾

161. යහපත් කරන තැනැත්තා ඒ වෙනුවෙන් දහ ගුණයක් (ඵල විපාක) ලබන්නේය. අයහපතක් කරන තැනැත්තා ඊට සමාන වූ ප්‍රතිවිපාක (දඬුවම්) ලබන්නේය. ඔවුන්ට අසාධාරණයක් අත් නොවන්නේය.

مَنْ جَاءَ بِالْحَسَنَةِ فَلَهُ عَشْرُ أَمْثَالِهَا ۖ وَمَنْ جَاءَ بِالسَّيِّئَةِ فَلَا يُجْزَىٰ إِلَّا مِثْلَهَا وَهُمْ لَا يُظْلَمُونَ ﴿١٦١﴾

162. ඔබ (ඔවුනට) 'ඇත්තෙන්ම මාගේ අධිපතියාණන් මා වෙත සෘජු මාර්ගය පෙන්වා ඇත්තේය. (එය) ස්ථිර වූ ආගමකි (එමෙන්ම එය) සත්‍යයෙහි නිරතවන්නා ඉබ්රාහීම්ගේ ආගමකි. හෙතෙම දෙවියන් කෙරෙහි සමාන තබන්නන්ගෙන් නොවීය'යි පවසන්න.

قُلْ إِنَّنِي هَدَانِي رَبِّي إِلَىٰ صِرَاطٍ مُسْتَقِيمٍ دِينًا قِيَمًا مِلَّةَ إِبْرَاهِيمَ حَنِيفًا ۚ وَمَا كَانَ مِنَ الْمُشْرِكِينَ ﴿١٦٢﴾

163. ඔබ (ඔවුනට) 'ඇත්තෙන්ම මාගේ නමස්කාරයද, මාගේ පරිත්‍යාගයද, මාගේ ජීවිතයද, මාගේ මරණයද සියලු ලෝකයන්ට අධිපතියාණන් වූ අල්ලාහ්ටම යැ'යි පවසන්න.

قُلْ إِنَّ صَلَاتِي وَنُسُكِي وَمَحْيَايَ وَمَمَاتِي لِلَّهِ رَبِّ الْعَالَمِينَ ﴿١٦٣﴾

164. 'ඔහුට සමානයක් නොමැත. තවද, මම අවනත වන්නන්ගෙන් ප්‍රථමයා වෙමියි මෙසේ මම අණ කරනු ලැබුවෙමි'.

لَا شَرِيكَ لَهُۥ ۖ وَبِذَٰلِكَ أُمِرْتُ وَأَنَا أَوَّلُ الْمُسْلِمِينَ ١٦٤

165. පවසන්න, 'සියල්ලන්ටම අධිපතියාණන් වන ඔහු සිටියදී අල්ලාහ් හැර වෙනත් අධිපතියෙකු මම පතන්නෙම්ද?' කිසිදු ආත්මයක් තමාට එරෙහිව මිස එහි (නපුරුකමේ) බර උසුලන්නේ නැත. සෑම කෙනෙකුටම ඔහු ඉපැයූ දේ ලැබෙන්නේය. බර උසුලන්නා කවුරු හෝ වේවා අනෙකුගේ බර නොඋසුලන්නේය. අනතුරුව නුඹලාගේ ආපසු පැමිණිය යුතු තැන නුඹලාගේ අධිපතියාණන් වෙතය. එබැවින් නුඹලා මතභේද ඇතිකරමින් සිටි දේ පිළිබඳව ඔහු නුඹලාට දැනුම් දෙන්නේය.

قُلْ أَغَيْرَ اللَّهِ أَبْغِي رَبًّا وَهُوَ رَبُّ كُلِّ شَيْءٍ ۚ وَلَا تَكْسِبُ كُلُّ نَفْسٍ إِلَّا عَلَيْهَا ۚ وَلَا تَزِرُ وَازِرَةٌ وِزْرَ أُخْرَىٰ ۚ ثُمَّ إِلَىٰ رَبِّكُم مَّرْجِعُكُمْ فَيُنَبِّئُكُم بِمَا كُنتُمْ فِيهِ تَخْتَلِفُونَ ١٦٥

166. නුඹලාව මෙලොවෙහි නියෝජිතයින් ලෙස පත්කර ඇත්තේ ඔහුමය. ඔහු නුඹලාට දුන් දේ පිළිබඳව ඔහු නුඹලාව පරීක්ෂා කර බැලීම සඳහා නුඹලාගෙන් සමහරෙකුට, සමහරුන්ට වඩා තරාතිරම් උසස් කළේය. සත්තකින්ම ඔබගේ අධිපතියාණන් දඬුවම් දීමෙහි ඉතාමත් කඩිසරය. එමෙන්ම සත්තකින්ම ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَهُوَ الَّذِي جَعَلَكُمْ خَلَٰٓئِفَ الْأَرْضِ وَرَفَعَ بَعْضَكُمْ فَوْقَ بَعْضٍ دَرَجَٰتٍ لِّيَبْلُوَكُمْ فِي مَآ ءَاتَىٰكُمْ ۗ إِنَّ رَبَّكَ سَرِيعُ الْعِقَابِ وَإِنَّهُۥ لَغَفُورٌ رَّحِيمٌ ١٦٦




## අල් අඃරාෆ්

(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓصٓ ۝٢

2. අලිෆ් ලාම් මීම් සාද්◆

كِتٰبٌ اُنْزِلَ اِلَيْكَ فَلَا يَكُنْ فِيْ صَدْرِكَ حَرَجٌ مِّنْهُ لِتُنْذِرَ بِهٖ وَذِكْرٰى لِلْمُؤْمِنِيْنَ ۝٣

3. (මෙය) ඔබට පහළ කරන ලද ග්‍රන්ථයකි. එමනිසා මෙය ගැන ඔබගේ හදවතේ අපහසුතාවයක් විය යුතු නොවේ. ඔබ එමගින් අවවාද කිරීමටත්, (මෙය) විශ්වාසිතයින්ට අනුශාසනාවක් වනු පිණිසත් වේ.

اِتَّبِعُوْا مَآ اُنْزِلَ اِلَيْكُمْ مِّنْ رَّبِّكُمْ وَلَا تَتَّبِعُوْا مِنْ دُوْنِهٖٓ اَوْلِيَآءَ ۗ قَلِيْلًا مَّا تَذَكَّرُوْنَ ۝٤

4. නුඹලාගේ අධිපතියාණන් වෙතින් නුඹලා වෙත පහළ කරනු ලැබූ දේ අනුගමනය කරනු. තවද ඔහු හැරෙන්නට වෙනත් ආරක්ෂකයින් අනුගමනය නොකරනු. නුඹලා සිහිතබා ගන්නේ කෙතරම් ස්වල්පයක්ද!

وَكَمْ مِّنْ قَرْيَةٍ اَهْلَكْنٰهَا فَجَآءَهَا بَاْسُنَا بَيَاتًا اَوْ هُمْ قَآئِلُوْنَ ۝٥

5. අපි කොපමණ නගරයන් විනාශ කර ඇත්තෙමුද! තවද රාත්‍රියෙහි හෝ ඔවුන් දවාලෙහි විවේක ගනිමින් සිටිය විටදී හෝ අපගේ දඬුවම පැමිණියේය.

فَمَا كَانَ دَعْوٰىهُمْ اِذْ جَآءَهُمْ بَاْسُنَآ اِلَّآ اَنْ قَالُوْٓا اِنَّا كُنَّا ظٰلِمِيْنَ ۝٦

6. පසුව අපගේ දඬුවම ඔවුන් වෙත පැමිණි විට 'අපි ඇත්තෙන්ම වැරදිකරන්නන් වූවෙමු!'යි පවසනවා මිස ඔවුන්ගේ අඳෝනාව අන්කිසිවක් නොවීය.

فَلَنَسْـَٔلَنَّ الَّذِيْنَ اُرْسِلَ اِلَيْهِمْ وَلَنَسْـَٔلَنَّ الْمُرْسَلِيْنَ ۝٧

7. එහෙයින්, අප විසින් කවුරුන්හට (දූතයින්) යවනු ලැබූ වේද, අපි ඔවුන්ගෙන් නිසැකවම ප්‍රශ්න කරන්නෙමු. එමෙන්ම දූතයින්ගෙන්ද අපි නිසැකවම ප්‍රශ්න කරන්නෙමු.

◆මම අල්ලාහ්, මම දනිමි, මම සත්‍යය විස්තර කරමි.

8. පසුව අපි දැනුමෙන් යුතුව (ඔවුන්ගේ ක්‍රියාවන්) ඔවුනට නිසැකවම කියාදෙන්නෙමු. මන්දයත් අපි කිසිවිටෙක අවිද්‍යාමානව නොවී සිටියෙමු.

فَلَنَقُصَّنَّ عَلَيۡهِمۡ بِعِلۡمٍ وَّمَا كُنَّا غَآئِبِيۡنَ ﴿٨﴾

9. තවද එදින කිරා බැලීම සත්‍යය වන්නේය. එවිට කවරෙකුගේ හෝ තරාදියන් බර වන්නේද ඔවුන්ම ජයග්‍රාහකයින් වන්නෝය.

وَالۡوَزۡنُ يَوۡمَئِذِ اۨلۡحَقُّ‌ ۚ فَمَنۡ ثَقُلَتۡ مَوَازِيۡنُهٗ فَاُولٰۤئِكَ هُمُ الۡمُفۡلِحُوۡنَ ﴿٩﴾

10. තවද කවරෙකුගේ තරාදියන් සැහැල්ලු වන්නේද, අපගේ සළකුණුවලට අසාධාරණ කිරීම හේතුවෙන් තමන්ගේ ආත්මයන් විනාශ කරගත්තේ ඔවුන්මය.

وَمَنۡ خَفَّتۡ مَوَازِيۡنُهٗ فَاُولٰۤئِكَ الَّذِيۡنَ خَسِرُوۡۤا اَنۡفُسَهُمۡ بِمَا كَانُوۡا بِاٰيٰتِنَا يَظۡلِمُوۡنَ ﴿١٠﴾

11. තවද අපි නුඹලා පොළොවෙහි ස්ථාපිත කර, එහි නුඹලාට ජීවනෝපායන් සලස්වා දී ඇත්තෙමු. නුඹලා දක්වන කෘතඥතාවය කෙතරම් අල්පද!.

وَلَقَدۡ مَكَّنّٰكُمۡ فِى الۡاَرۡضِ وَجَعَلۡنَا لَـكُمۡ فِيۡهَا مَعَايِشَ‌ ؕ قَلِيۡلًا مَّا تَشۡكُرُوۡنَ ﴿١١﴾

12. ඇත්තෙන්ම අපි නුඹලා මැව්වෙමු. (තවද) අපි නුඹලාව හැඩ ගැස්වීමු. පසුව අපි 'ආදම්ට අවනතවනු' යි සුරදූතයින්ට කීවෙමු. තවද ඔවුහු (සියළු දෙනාම) අවනත වූහ. එහෙත් ඉබ්ලීස් (නොවීය). ඔහු අවනතවන්නන්ගෙන් නොවීය.

وَلَقَدۡ خَلَقۡنٰكُمۡ ثُمَّ صَوَّرۡنٰكُمۡ ثُمَّ قُلۡنَا لِلۡمَلٰۤئِكَةِ اسۡجُدُوۡا لِاٰدَمَ ‌ۖ فَسَجَدُوۡۤا اِلَّاۤ اِبۡلِيۡسَ ؕ لَمۡ يَكُنۡ مِّنَ السّٰجِدِيۡنَ ﴿١٢﴾

13. 'මා නුඹට අණකල විට නුඹව අවනතවීමෙන් වැළැක්වූයේ කුමක්දැ?' යි (අල්ලාහ්) කීවේය. 'මම ඔහුට වඩා හොඳ වෙමි. ඔබ මා මවා ඇත්තේ ගින්නෙන්ය, නමුත් ඔබ ඔහුව මවා ඇත්තේ මැටියෙන් යැ'යි ඔහු කිය.

قَالَ مَا مَنَعَكَ اَلَّا تَسۡجُدَ اِذۡ اَمَرۡتُكَ‌ ؕ قَالَ اَنَا خَيۡرٌ مِّنۡهُ‌ ۚ خَلَقۡتَنِىۡ مِنۡ نَّارٍ وَّخَلَقۡتَهٗ مِنۡ طِيۡنٍ ﴿١٣﴾

14. 'එසේනම් මෙතැනින් ඉවත්ව යනු. මෙය නුඹ අහංකාර වීමේ තැනක් නොවේ. පිටවනු. නියතවශයෙන්ම නුඹ නින්දාවට පත්වූ අයගෙන් කෙනෙක්යැ.' යි (දෙවියන්)

قَالَ فَاهۡبِطۡ مِنۡهَا فَمَا يَكُوۡنُ لَكَ اَنۡ تَتَكَبَّرَ فِيۡهَا فَاخۡرُجۡ اِنَّكَ مِنَ

ٱلصَّٰغِرِينَ ⑭

කීවේය.

قَالَ أَنظِرْنِىٓ إِلَىٰ يَوْمِ يُبْعَثُونَ ⑮

15. 'ඔවුන් නැගිටවනු ලබන දිනය තෙක් මට අවකාශයක් ලබා දෙන්නැ'යි ඔහු කීවේය.

قَالَ إِنَّكَ مِنَ ٱلْمُنظَرِينَ ⑯

16. 'නුඹ අවකාශයක් දෙනු ලබන්නන් ගෙන් කෙනෙකුම වේ' යැයි (දෙවියන්) කීවේය.

قَالَ فَبِمَآ أَغْوَيْتَنِى لَأَقْعُدَنَّ لَهُمْ صِرَٰطَكَ ٱلْمُسْتَقِيمَ ⑰

17. 'මා නොමග ගියෙකු ලෙස ඔබ තීරණය කර ඇති බැවින් නියතවශයෙන්ම ඔබගේ සෘජු මාර්ගයෙහි මම ඔවුන්ව ඉලක්ක කරමින් සිටින්නෙමි.' යි ඔහු කීවේය.

ثُمَّ لَءَاتِيَنَّهُم مِّنۢ بَيْنِ أَيْدِيهِمْ وَمِنْ خَلْفِهِمْ وَعَنْ أَيْمَٰنِهِمْ وَعَن شَمَآئِلِهِمْ ۖ وَلَا تَجِدُ أَكْثَرَهُمْ شَٰكِرِينَ ⑱

18. 'එවිට මම ඔවුන්ගේ ඉදිරිපසින්ද ඔවුන්ගේ පිටුපසින්ද ඔවුන්ගේ දකුණෙන් හා ඔවුන්ගේ වමෙන්ද ඔවුන් වෙත නියතවශයෙන්ම පැමිණෙන්නෙමි. තවද ඔවුන්ගෙන් බොහෝ දෙනා කෘතගුණ දක්වන්නන් බව ඔබ නොදකින්නේය.'

قَالَ ٱخْرُجْ مِنْهَا مَذْءُومًا مَّدْحُورًا ۖ لَّمَن تَبِعَكَ مِنْهُمْ لَأَمْلَأَنَّ جَهَنَّمَ مِنكُمْ أَجْمَعِينَ ⑲

19. 'අවමානයට පත්වුවෙකු හා පලවා හරින ලද්දෙකු ලෙස මෙතැනින් පිටවනු. ඔවුන්ගෙන් කවුරුන් හෝ නුඹව අනුගමනය කරන්නේද මා නියතවශයෙන්ම නුඹලා සියල්ලන්ගෙන් නිරය පුරවන්නෙමි'යි (දෙවියන්) කීවේය.

وَيَٰٓـَٔادَمُ ٱسْكُنْ أَنتَ وَزَوْجُكَ ٱلْجَنَّةَ فَكُلَا مِنْ حَيْثُ شِئْتُمَا وَلَا تَقْرَبَا هَٰذِهِ ٱلشَّجَرَةَ فَتَكُونَا مِنَ ٱلظَّٰلِمِينَ ⑳

20. තවද 'එම්බා ආදම්! ඔබද ඔබගේ බිරිඳද උද්‍යානයෙහි වාසය කරනු. ඔබලා කැමති අයුරින් මෙයින් ඕනෑම තැනකින් අනුභව කරනු. එහෙත් මෙම ගසට ළඟා නොවනු. එසේ නොවුවහොත් ඔබලා වරදකරුවන් වන්නේයැ'යි අපි කීවෙමු.

فَوَسْوَسَ لَهُمَا ٱلشَّيْطَٰنُ لِيُبْدِىَ لَهُمَا مَا وُۥرِىَ عَنْهُمَا مِن سَوْءَٰتِهِمَا وَقَالَ مَا

21. එහෙත් ෂෙයිතාන් ඔවුන් තුළ සැඟවී තිබුණු ඔවුන්ගේ විළිය වන ඔවුන්ගේ අඩුපාඩුකම් ඔහු එළිකරනු පිණිස ඔවුනට (යෝජනා) කෙඳුරුවේය. තවද 'නුඹලාගේ

نَهٰكُمَا رَبُّكُمَا عَنْ هٰذِهِ الشَّجَرَةِ اِلَّآ اَنْ تَكُوْنَا مَلَكَيْنِ اَوْ تَكُوْنَا مِنَ الْخٰلِدِيْنَ ﴿٢١﴾

අධිපතියාණන් මෙම ගස නුඹලාට තහනම් කර ඇත්තේ නුඹලා සුරදූතයින් බවට පත්වීම හෝ සදා අමරණීය (වන්නන්) වීම වැළැක්වීම සඳහා පමණක් යැ'යි කීවේය.

وَقَاسَمَهُمَآ اِنِّيْ لَكُمَا لَمِنَ النّٰصِحِيْنَ ﴿٢٢﴾

22. තවද 'සැබැවින් මම නුඹලාට අවංක අනුශාසකයෙක් වෙමි'යි (පවසමින්) ඔහු ඔවුන්ට දිවුරුවේය.

فَدَلّٰىهُمَا بِغُرُوْرٍ ۚ فَلَمَّا ذَاقَا الشَّجَرَةَ بَدَتْ لَهُمَا سَوْاٰتُهُمَا وَطَفِقَا يَخْصِفٰنِ عَلَيْهِمَا مِنْ وَّرَقِ الْجَنَّةِ ۖ وَنَادٰىهُمَا رَبُّهُمَآ اَلَمْ اَنْهَكُمَا عَنْ تِلْكُمَا الشَّجَرَةِ وَاَقُلْ لَّكُمَآ اِنَّ الشَّيْطٰنَ لَكُمَا عَدُوٌّ مُّبِيْنٌ ﴿٢٣﴾

23. එබැවින් ඔහු මුලාවෙන් ඔවුනට (අකීකරුභාවයට) යොමුවන්නට සැලැස්වීය. තවද ඔවුන් එම ගසින් රසවිඳු කල්හි ඔවුන්ගේ විළිය ඔවුනට පෙනෙන්නට විය. තවද ඔවුන් (එක්ව) උද්‍යානයේ කොළවලින් ඔවුන්වම ආවරණය කර ගත්හ. තවද 'මම නුඹලාට එම ගස තහනම් නොකළෙම්ද? තවද සැබැවින්ම ෂෙයිතාන් නුඹලාට විවෘත සතුරෙකු වේයැයි නුඹලාට නොකීවෙම්දැ?'යි (පවසමින්) ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන් කැඳවීය.

قَالَا رَبَّنَا ظَلَمْنَآ اَنْفُسَنَا ۫ وَاِنْ لَّمْ تَغْفِرْ لَنَا وَتَرْحَمْنَا لَنَكُوْنَنَّ مِنَ الْخٰسِرِيْنَ ﴿٢٤﴾

24. 'අප අධිපතියාණෙනි, අපි අපටම වරද කරගෙන ඇත්තෙමු. තවද ඔබ අපට ක්ෂමා නොවී දයාව නොදැක්වුවහොත් අපි නියත වශයෙන්ම පරාජිතයින්ගෙන් වන්නෙමු' යි ඔවුහු කීහ.

قَالَ اهْبِطُوْا بَعْضُكُمْ لِبَعْضٍ عَدُوٌّ ۚ وَلَكُمْ فِي الْاَرْضِ مُسْتَقَرٌّ وَّمَتَاعٌ اِلٰى حِيْنٍ ﴿٢٥﴾

25. 'ඉවත්ව යනු, නුඹලාගෙන් සමහරෙක් සමහරෙකුගේ සතුරන්(වන්නෝ)ය. තවද පොළොවෙහි වාසස්ථානයක්ද කලකට ජීවනෝපායද නුඹලාට ඇතැ'යි ඔහු කීවේය.

قَالَ فِيْهَا تَحْيَوْنَ وَفِيْهَا تَمُوْتُوْنَ وَمِنْهَا تُخْرَجُوْنَ ﴿٢٦﴾ ع

26. 'නුඹලා මෙහි ජීවත් වන්නෝය. තවද නුඹලා මෙහිම මරණයට පත් වන්නෝය. තවද නුඹලා මෙහිසිටම ගෙන යනු ලබන්නෝ යැ'යි ඔහු කීවේය.

27. එම්බල ආදම්ගේ දරුවනි! සැබැවින්ම අපි නුඹලාට වස්ත්‍රය නුඹලාගේ විළිය වසා ගැනීමටත්, අලංකාරවත් ඇඳුමක් වීමටත් පහළ කර ඇත්තෙමු. එහෙත් දේවබියෙහි වස්ත්‍රය නම් එය ඉතා හොඳය. එය ඔවුන් සිහිතබා ගනු පිණිස අල්ලාහ්ගේ සලකුණු වලින් (එකක්)ය.

يَٰبَنِىٓ ءَادَمَ قَدْ أَنزَلْنَا عَلَيْكُمْ لِبَاسًا يُوَٰرِى سَوْءَٰتِكُمْ وَرِيشًا ۖ وَلِبَاسُ ٱلتَّقْوَىٰ ذَٰلِكَ خَيْرٌ ۚ ذَٰلِكَ مِنْ ءَايَٰتِ ٱللَّهِ لَعَلَّهُمْ يَذَّكَّرُونَ ﴿٢٧﴾

28. එම්බල ආදම්ගේ දරුවනි, ෂෛයිතාන් නුඹලාගේ දෙමව්පියන්ව උද්‍යානයෙන් පිටමං කළ ආකාරයට ඔහු නුඹලාවද නොමග යැවීමට ඉඩ නොදෙත්වා. ඔවුන්ගේ විළිය ඔහු ඔවුනට පෙන්වීම සඳහා ඔවුන්ගේ වස්ත්‍රය ඔවුන්ගෙන් ඔහු උදුරා ගත්තේය. ඇත්තෙන්ම නුඹලා ඔවුන්ව නොදකින තැනක සිට ඔහු සහ ඔහුගේ ගෝත්‍රය නුඹලාව දකිති. ඇත්තෙන්ම අපි විශ්වාස නොකරන්නන් හට ෂෛයිතානුන්ව මිතුරන් කර ඇත්තෙමු.

يَٰبَنِىٓ ءَادَمَ لَا يَفْتِنَنَّكُمُ ٱلشَّيْطَٰنُ كَمَآ أَخْرَجَ أَبَوَيْكُم مِّنَ ٱلْجَنَّةِ يَنزِعُ عَنْهُمَا لِبَاسَهُمَا لِيُرِيَهُمَا سَوْءَٰتِهِمَآ ۗ إِنَّهُۥ يَرَىٰكُمْ هُوَ وَقَبِيلُهُۥ مِنْ حَيْثُ لَا تَرَوْنَهُمْ ۗ إِنَّا جَعَلْنَا ٱلشَّيَٰطِينَ أَوْلِيَآءَ لِلَّذِينَ لَا يُؤْمِنُونَ ﴿٢٨﴾

29. තවද ඔවුන් පිළිකුල් ක්‍රියාවක් කරන විට ඔවුහු 'අපගේ පියවරුන්වද එසේම අපි දුටුවෙමු, තවද අල්ලාහ් එය අප කෙරෙහි අණ කර ඇතැයි' කියති. 'අල්ලාහ් කිසිවිටක පිළිකුල් ක්‍රියාවන් අණ නොකරයි. නුඹලා අල්ලාහ් ගැන නොදන්නා දේ කියන්නේදැ?'යි පවසන්න.

وَإِذَا فَعَلُوا۟ فَٰحِشَةً قَالُوا۟ وَجَدْنَا عَلَيْهَآ ءَابَآءَنَا وَٱللَّهُ أَمَرَنَا بِهَا ۗ قُلْ إِنَّ ٱللَّهَ لَا يَأْمُرُ بِٱلْفَحْشَآءِ ۖ أَتَقُولُونَ عَلَى ٱللَّهِ مَا لَا تَعْلَمُونَ ﴿٢٩﴾

30. පවසන්න, 'මාගේ අධිපතියාණන් යුක්තිය අණ කර ඇත. තවද සෑම (වේලාවකම සහ) නැමදුම් ස්ථානයකදීම නුඹලාගේ අවධානය නිසියාකාරව යොමු කරනු. තවද ආගමෙහි ඔහු වෙත අවංකවෙමින් ඔහුවම අයදිනු. ඔහු නුඹලාට ජීවය දුන් ආකාරයටම නුඹලා ආපසු යන්නෙහුය.'

قُلْ أَمَرَ رَبِّى بِٱلْقِسْطِ ۖ وَأَقِيمُوا۟ وُجُوهَكُمْ عِندَ كُلِّ مَسْجِدٍ وَٱدْعُوهُ مُخْلِصِينَ لَهُ ٱلدِّينَ ۚ كَمَا بَدَأَكُمْ تَعُودُونَ ﴿٣٠﴾

31. ඔහු සමහරුන්ට මග පෙන්වා ඇත. තවද අනෙකුත් අයට ඔවුන් කෙරෙහි දුර්මාර්ගය ස්ථිර විය. ඔවුන් අල්ලාහ් හැර දුෂ්ඨයින්ව මිතුරන් කරගෙන ඇති අතර ඔවුන් යහමග යොමු කරනු ලැබුවන් යැයි ඔවුහු සිතති.

فَرِيقًا هَدَىٰ وَفَرِيقًا حَقَّ عَلَيْهِمُ الضَّلَالَةُ ۗ إِنَّهُمُ اتَّخَذُوا الشَّيَاطِينَ أَوْلِيَاءَ مِن دُونِ اللَّهِ وَيَحْسَبُونَ أَنَّهُم مُّهْتَدُونَ ٣١

32. එම්බල ආදම්ගේ දරුවනි! සෑම (වේලාවකම සහ) නැමදුම් ස්ථානයකදීම අලංකාරය පවත්වා ගනු. එමෙන්ම අනුභව කරනු, තවද පානය කරනු, නමුත් සීමාවන් ඉක්මවා නොයනු. නියත වශයෙන්ම ඔහු සීමාවන් ඉක්මවා යන්නන්ව ප්‍රිය නොකරයි.

يَا بَنِي آدَمَ خُذُوا زِينَتَكُمْ عِندَ كُلِّ مَسْجِدٍ وَكُلُوا وَاشْرَبُوا وَلَا تُسْرِفُوا ۚ إِنَّهُ لَا يُحِبُّ الْمُسْرِفِينَ ٣٢

33. 'අල්ලාහ්, ඔහුගේ දාසයින් සඳහා ඔහු සලසාදී ඇති අලංකාරය හා (ඔහුගේ) සැපයුමෙහි යහපත් දේවල් තහනම් කර ඇත්තේ කවරෙකුද,?'යි පවසන්න. 'ඒවා මෙලොව ජීවිතයේදී විශ්වාසිතයින්ට වන අතර පුනරුත්ථාන දිනයේදී (ඒවා ඔවුන් සඳහා) පමණක්ම වන්නේය. මේ ආකාරයට අපි නුවණැති මිනිසුනට සළකුණු විස්තර කර දෙමු'යි පවසන්න.

قُلْ مَنْ حَرَّمَ زِينَةَ اللَّهِ الَّتِي أَخْرَجَ لِعِبَادِهِ وَالطَّيِّبَاتِ مِنَ الرِّزْقِ ۚ قُلْ هِيَ لِلَّذِينَ آمَنُوا فِي الْحَيَاةِ الدُّنْيَا خَالِصَةً يَوْمَ الْقِيَامَةِ ۗ كَذَٰلِكَ نُفَصِّلُ الْآيَاتِ لِقَوْمٍ يَعْلَمُونَ ٣٣

34. 'මාගේ අධිපතියාණන් තහනම් කර ඇත්තේ විවෘතවූ හෝ සැඟවූ හෝ පිළිකුල් ක්‍රියාවන්ද, එලෙසම පාපය හා වැරදි සහගත වූ සීමාව ඉක්මවීමද, ඔහු අනුමැතිය පහළ කර නොමැති දේ නුඹලා අල්ලාහ්ට සමාන තැබීමද, එමෙන්ම අල්ලාහ් ගැන නුඹලා නොදන්නා දේ නුඹලා කීමද පමණක්යැ'යි පවසන්න.

قُلْ إِنَّمَا حَرَّمَ رَبِّيَ الْفَوَاحِشَ مَا ظَهَرَ مِنْهَا وَمَا بَطَنَ وَالْإِثْمَ وَالْبَغْيَ بِغَيْرِ الْحَقِّ وَأَن تُشْرِكُوا بِاللَّهِ مَا لَمْ يُنَزِّلْ بِهِ سُلْطَانًا وَأَن تَقُولُوا عَلَى اللَّهِ مَا لَا تَعْلَمُونَ ٣٤

35. තවද සෑම ජන සමූහයක් සඳහාම නියමිත කාලයක් ඇත. තවද ඔවුන්ගේ කාලය පැමිණෙන විට එක් මොහොතක් හෝ නැවති සිටීමට ඔවුනට නොහැක. (එයින්) ඉදිරියට යාමටද ඔවුනට නොහැක.

وَلِكُلِّ أُمَّةٍ أَجَلٌ ۖ فَإِذَا جَاءَ أَجَلُهُمْ لَا يَسْتَأْخِرُونَ سَاعَةً ۖ وَلَا يَسْتَقْدِمُونَ ٣٥

36. එම්බල ආදම්ගේ දරුවනි!, මාගේ සලකුණු නුඹලාට කියා දෙන්නාවූ දූතයින් නුඹලා අතුරෙන් නුඹලා වෙත පැමිණෙන විටදී කවුරුන් හෝ දෙවියන් කෙරෙහි බිය

يَا بَنِي آدَمَ إِمَّا يَأْتِيَنَّكُمْ رُسُلٌ مِّنكُمْ يَقُصُّونَ عَلَيْكُمْ آيَاتِي ۙ فَمَنِ اتَّقَىٰ وَأَصْلَحَ

فَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُونَ ٣٦

දක්වමින් යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නේද ඔවුනට බියක් (ඇති වන්නේ) නැත, ඔවුන් දුක් වන්නේද නැත.

وَالَّذِينَ كَذَّبُوا بِآيَاتِنَا وَاسْتَكْبَرُوا عَنْهَا أُولَٰئِكَ أَصْحَابُ النَّارِ ۖ هُمْ فِيهَا خَالِدُونَ ٣٧

37. එහෙත් කවුරුන්හෝ අපගේ සලකුණු ප්‍රතික්ෂේප කර ඒවායෙන් ගර්වයෙන් යුතුව ඉවත්ව යන්නේද මොවුන් ගින්නෙහි සහකරුවන් වන්නෝය. මොවුන් එහිම දිගුකල් වෙසෙන්නෝය.

فَمَنْ أَظْلَمُ مِمَّنِ افْتَرَىٰ عَلَى اللَّهِ كَذِبًا أَوْ كَذَّبَ بِآيَاتِهِ ۚ أُولَٰئِكَ يَنَالُهُمْ نَصِيبُهُم مِّنَ الْكِتَابِ ۖ حَتَّىٰ إِذَا جَاءَتْهُمْ رُسُلُنَا يَتَوَفَّوْنَهُمْ قَالُوا أَيْنَ مَا كُنتُمْ تَدْعُونَ مِن دُونِ اللَّهِ ۖ قَالُوا ضَلُّوا عَنَّا وَشَهِدُوا عَلَىٰ أَنفُسِهِمْ أَنَّهُمْ كَانُوا كَافِرِينَ ٣٨

38. තවද අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නාට හෝ ඔහුගේ සලකුණු බොරු කරන්නාට වඩා අදමිටුවා කවරෙක්ද? නියමකර ඇති දෙයින් තමන්ට හිමි කොටස ඔවුනට ලැබෙන්නේය. අවසානයේදී අපගේ (සුර) දූතයින් ඔවුන්ගේ ආත්මයන් රැගෙන යාමට ඔවුන් වෙත පැමිණෙන විට ඔවුන්, 'අල්ලාහ් හැර නුඹලා කැඳවමින් සිටි අය කොහේදැ?'යි අසන්නෝය. එවිට 'අපගෙන් ඔවුන් මුළුමනින්ම අතුරුදහන්ව ඇතැ'යි ඔවුන් පිළිතුරු දෙන්නෝය. තවද තමන් අවිශ්වාසිතයින් වූ බව ඔවුන් තමන්ට විරුද්ධව සාක්ෂි දරන්නෝය.

قَالَ ادْخُلُوا فِي أُمَمٍ قَدْ خَلَتْ مِن قَبْلِكُم مِّنَ الْجِنِّ وَالْإِنسِ فِي النَّارِ ۖ كُلَّمَا دَخَلَتْ أُمَّةٌ لَّعَنَتْ أُخْتَهَا ۖ حَتَّىٰ إِذَا ادَّارَكُوا فِيهَا جَمِيعًا قَالَتْ أُخْرَاهُمْ لِأُولَاهُمْ رَبَّنَا هَٰؤُلَاءِ أَضَلُّونَا فَآتِهِمْ عَذَابًا ضِعْفًا مِّنَ النَّارِ ۖ قَالَ لِكُلٍّ ضِعْفٌ وَلَٰكِن لَّا تَعْلَمُونَ ٣٩

39. 'නුඹලාට පෙර ජින් සහ මනුෂ්‍ය ජාතීන් අතරේ කාලක්‍රියා කළ අයහට නුඹලා ගින්න තුළට ඇතුල් වනු'යි ඔහු පවසන්නේය. ජන කොටසක් ඇතුල් වන සෑමවිටම එය තම සහෝදර (ජනයා)ට ශාප කරන්නේය. ඔවුන් සියළුදෙනාම එය තුලට පිළිවෙලින් පිවිසෙන විට ඔවුන්ගෙන් පසුව එන අය ඔවුන්ගෙන් පෙර(ආ) අය ගැන 'අප අධිපතියාණනි, මොවුහු අප නොමඟ යැවූහ. එබැවින් මොවුන්ට ගින්නෙහි දෙගුණ දඬුවමක් දෙනු මැනවැ'යි පවසන්නෝය. ඔහු '(පෙර ගිය පිරිස්) සැමටම දෙගුණ (දඬුවම) වේ. එහෙත් නුඹලා නොදන්නෙහුයැ'යි පවසන්නේය.

وَقَالَتْ أُولَاهُمْ لِأُخْرَاهُمْ فَمَا كَانَ

40. තවද 'අප කෙරෙහි ශ්‍රේෂ්ඨත්වයක් නුඹලාට නැත.

لَكُمْ عَلَيْنَا مِنْ فَضْلٍ فَذُوقُوا الْعَذَابَ بِمَا كُنْتُمْ تَكْسِبُونَ ﴿٤٠﴾

එබැවින් නුඹලා කළ දේ සියල්ල වෙනුවෙන් දඬුවම් විඳිනු' යි ඔවුන්ගෙන් පෙර ආ අය ඔවුන්ගෙන් පසුව එන අයට කියන්නෝය.

إِنَّ الَّذِينَ كَذَّبُوا بِآيَاتِنَا وَاسْتَكْبَرُوا عَنْهَا لَا تُفَتَّحُ لَهُمْ أَبْوَابُ السَّمَاءِ وَلَا يَدْخُلُونَ الْجَنَّةَ حَتَّىٰ يَلِجَ الْجَمَلُ فِي سَمِّ الْخِيَاطِ ۚ وَكَذَٰلِكَ نَجْزِي الْمُجْرِمِينَ ﴿٤١﴾

41. කවුරුන්හෝ අපගේ සලකුණු ප්‍රතික්ෂේප කර ඒවායෙන් ගර්වයෙන් යුතුව ඉවත්ව යන්නේද ඔවුන් වෙනුවෙන් අහස්හි දොරටු විවෘත නොකරනු ලබන්නේය. එමෙන්ම ඉඳිකටු මලෙහි ඔටුවෙකු ඇතුල් වන තුරු ඔවුහු ස්වර්ගයට නොපිවිසෙන්නෝය. තවද මේ ආකාරයටම අපි වරදකරුවන්ට විපාක දෙන්නෙමු.

لَهُمْ مِنْ جَهَنَّمَ مِهَادٌ وَمِنْ فَوْقِهِمْ غَوَاشٍ ۚ وَكَذَٰلِكَ نَجْزِي الظَّالِمِينَ ﴿٤٢﴾

42. ඔවුන්ට නිරයේ සයනයක් ඇති අතර (එහි) ආවරණයන්ද ඔවුන්ට ඉහළින් ඇත. තවද මේ ආකාරයටම අපි අදමිටුවන්ට විපාක දෙන්නෙමු.

وَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَا نُكَلِّفُ نَفْسًا إِلَّا وُسْعَهَا أُولَٰئِكَ أَصْحَابُ الْجَنَّةِ ۖ هُمْ فِيهَا خَالِدُونَ ﴿٤٣﴾

43. එහෙත් විශ්වාස කරමින් යහපත් ක්‍රියාවන් කරන අය ගත්කල අපි කිසිදු ආත්මයකට එයගේ ශක්තිය ඉක්මවා බර නොපටවන්නෙමු. මොවුහුම ස්වර්ගයේ වැසියෝ වෙති. මොවුහු එහිම වෙසෙන්නෝය.

وَنَزَعْنَا مَا فِي صُدُورِهِمْ مِنْ غِلٍّ تَجْرِي مِنْ تَحْتِهِمُ الْأَنْهَارُ ۖ وَقَالُوا الْحَمْدُ لِلَّهِ الَّذِي هَدَانَا لِهَٰذَا وَمَا كُنَّا لِنَهْتَدِيَ لَوْلَا أَنْ هَدَانَا اللَّهُ ۖ لَقَدْ جَاءَتْ رُسُلُ رَبِّنَا بِالْحَقِّ ۖ وَنُودُوا أَنْ تِلْكُمُ الْجَنَّةُ أُورِثْتُمُوهَا بِمَا كُنْتُمْ تَعْمَلُونَ ﴿٤٤﴾

44. තවද කුමන හෝ වෛරයක් ඔවුන්ගේ හදවත්තුල තිබුණේ නම් අපි එය ඉවත් කරන්නෙමු. ඔවුන්ට පහළින් ගංගාවන් ගලා බසිති. තවද ඔවුහු 'මෙය වෙත අපට මගපෙන්වූ අල්ලාහ්ට සියළු ප්‍රශංසා හිමිවේ. අල්ලාහ් අපට මග නොපෙන්වූයේ නම් අපට මග පෙන්වීම ලබාගැනීමට නොහැකි වීමට තිබිණි. අප අධිපතියාණන්ගේ දූතයෝ ඇත්තෙන්ම සත්‍ය ගෙන ආහ' යැයි පවසන්නෝය. 'නුඹලා කරමින් සිටිදේ වෙනුවෙන් නුඹලාට (තිළිණයක් ලෙස) දායාදයක් කරන ලද ස්වර්ගය මෙය වේයැ'යි ඔවුන් වෙත හඬනගා කියනු ලබන්නේය.

وَنَادَىٰٓ أَصۡحَٰبُ ٱلۡجَنَّةِ أَصۡحَٰبَ ٱلنَّارِ أَن قَدۡ وَجَدۡنَا مَا وَعَدَنَا رَبُّنَا حَقّٗا فَهَلۡ وَجَدتُّم مَّا وَعَدَ رَبُّكُمۡ حَقّٗاۖ قَالُواْ نَعَمۡۚ فَأَذَّنَ مُؤَذِّنُۢ بَيۡنَهُمۡ أَن لَّعۡنَةُ ٱللَّهِ عَلَى ٱلظَّٰلِمِينَ ﴿٤٥﴾

45. ස්වර්ගයේ වැසියන් අපායේ වැසියන් හට 'අපගේ අධිපතියාණන් අපට පොරොන්දු වූ දේ සත්‍යය බව අපි නිශ්චිතවම දැක ගත්තෙමු. නුඹලාගේ අධිපතියාණන් නුඹලාට පොරොන්දු වූ දේ සත්‍යය බව නුඹලා දැක ගත්තෙහුදැ?'යි හඬානගා කියන්නෝය. ඔවුහු 'එසේය' යැයි කියන්නෝය. එවිට 'අල්ලාහ්ගේ ශාපය වැරදි කරන්නන් හට වේ.' යැයි (පවසමින්) ඔවුනතර නිවේදකයෙක් හඬනගා කියන්නේය.

ٱلَّذِينَ يَصُدُّونَ عَن سَبِيلِ ٱللَّهِ وَيَبۡغُونَهَا عِوَجٗا وَهُم بِٱلۡأٓخِرَةِ كَٰفِرُونَ ﴿٤٦﴾

46. ඔවුහු අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වන අතර එය ඇද කිරීමට තැත් කරන්නෝය. තවද ඔවුහු පරලොව ගැන අවිශ්වාස කරන්නන් වෙති.

وَبَيۡنَهُمَا حِجَابٞۚ وَعَلَى ٱلۡأَعۡرَافِ رِجَالٞ يَعۡرِفُونَ كُلَّۢا بِسِيمَىٰهُمۡۚ وَنَادَوۡاْ أَصۡحَٰبَ ٱلۡجَنَّةِ أَن سَلَٰمٌ عَلَيۡكُمۡۚ لَمۡ يَدۡخُلُوهَا وَهُمۡ يَطۡمَعُونَ ﴿٤٧﴾

47. තවද දෙපාර්ශවය අතර වෙන්කිරීමේ තිරයක් වන්නේය. සියල්ලන්වම ඔවුන්ගේ සළකුණු මගින් හඳුනාගන්නාවූ පිරිසක් උස් තැන්වල සිටින්නෝය. තවද ඔවුහු 'ඔබලාට සාමය අත්වේවා'යි ස්වර්ගවාසීන්ට හඬ නගා කියන්නෝය. ඔවුන් (තවමත්) එයට පිවිසී නොමැති නමුත් ඔවුහු (එසේවීමට) බලාපොරොත්තුව සිටින්නෝය.

وَإِذَا صُرِفَتۡ أَبۡصَٰرُهُمۡ تِلۡقَآءَ أَصۡحَٰبِ ٱلنَّارِ قَالُواْ رَبَّنَا لَا تَجۡعَلۡنَا مَعَ ٱلۡقَوۡمِ ٱلظَّٰلِمِينَ ﴿٤٨﴾

48. තවද ඔවුන්ගේ නෙත් ගින්නෙහි වැසියන් වෙත හරවනු ලබන විට ඔවුන් 'අපගේ අධිපතියාණනි, අපව අදම්ටු ජනයා සමග එක් නොකරනු මැනව'යි කියන්නෝය.

وَنَادَىٰٓ أَصۡحَٰبُ ٱلۡأَعۡرَافِ رِجَالٗا يَعۡرِفُونَهُم بِسِيمَىٰهُمۡ قَالُواْ مَآ أَغۡنَىٰ عَنكُمۡ جَمۡعُكُمۡ وَمَا كُنتُمۡ تَسۡتَكۡبِرُونَ ﴿٤٩﴾

49. තවද උස් තැන්වල සිටින්නාවූ වැසියන් මිනිසුන් හට ඔවුන්ගේ සළකුණු මගින් ඔවුන්ව හඳුනාගනිමින් හඬනගා 'නුඹලාගේ පිරිස් බලයද නුඹලාගේ අහංකාරකමද නුඹලාට පලක් නොවීයැ'යි කියන්නෝය.

50. 'අල්ලාහ් මොවුන්ට දයාව නොදක්වන්නේ යැයි නුඹලා දිවුරා කිවේ මේ අය ගැනද?' (ඔවුනට) 'ස්වර්ගයට ඇතුල්වෙනු. නුඹලාට බිය (ඇති වන්නේ)ද නැත එමෙන්ම නුඹලා දුක් වන්නේද නැත'(යැයි කියන ලදි).

أَهَٰٓؤُلَآءِ ٱلَّذِينَ أَقْسَمْتُمْ لَا يَنَالُهُمُ ٱللَّهُ بِرَحْمَةٍ ۚ ٱدْخُلُوا۟ ٱلْجَنَّةَ لَا خَوْفٌ عَلَيْكُمْ وَلَآ أَنتُمْ تَحْزَنُونَ ﴿٥٠﴾

51. තවද ගින්නෙහි වැසියන් ස්වර්ගයේ වැසියන් හට හඬනගා 'අප හට වතුර ස්වල්පයක් වත්කරන්න නැතහොත් අල්ලාහ් ඔබලාට සපයාදී ඇති දෙයකින් ස්වල්පයක් දෙන්නැ'යි කියන්නෝය. ඔවුන් 'සැබැවින්ම අල්ලාහ් අවිශ්වාසිතයින් සඳහා මේ දෙකම තහනම් කර ඇත්තේයැ' යි පවසන්නෝය.

وَنَادَىٰٓ أَصْحَٰبُ ٱلنَّارِ أَصْحَٰبَ ٱلْجَنَّةِ أَنْ أَفِيضُوا۟ عَلَيْنَا مِنَ ٱلْمَآءِ أَوْ مِمَّا رَزَقَكُمُ ٱللَّهُ ۚ قَالُوٓا۟ إِنَّ ٱللَّهَ حَرَّمَهُمَا عَلَى ٱلْكَٰفِرِينَ ﴿٥١﴾

52. 'සිය ආගම විනෝදයක් හා සෙල්ලමක් ලෙස සැලකූ අයද මෙලොව ජීවිතය මුළා කළාවූ අයද ඔවුන්ය.' ඔවුන්ගේ මෙදින හමුව ඔවුන් අමතක කළාසේම සහ ඔවුන් අපගේ සලකුණු ප්‍රතික්ෂේප කරමින් සිටියාසේම මෙදිනෙහි අපිද ඔවුන්ව අමතක කරන්නෙමු.

ٱلَّذِينَ ٱتَّخَذُوا۟ دِينَهُمْ لَهْوًا وَلَعِبًا وَغَرَّتْهُمُ ٱلْحَيَوٰةُ ٱلدُّنْيَا ۚ فَٱلْيَوْمَ نَنسَىٰهُمْ كَمَا نَسُوا۟ لِقَآءَ يَوْمِهِمْ هَٰذَا وَمَا كَانُوا۟ بِـَٔايَٰتِنَا يَجْحَدُونَ ﴿٥٢﴾

53. තවද අපි ඔවුනට නියත වශයෙන්ම ග්‍රන්ථයක් ගෙන ආවෙමු. එය විශ්වාස කරන ජනයාට අප විස්තර කළාවූ දැනුමෙන් යුත් එකක් මෙන්ම මගපෙන්වීමක් හා දයාවක්ද වේ.

وَلَقَدْ جِئْنَٰهُم بِكِتَٰبٍ فَصَّلْنَٰهُ عَلَىٰ عِلْمٍ هُدًى وَرَحْمَةً لِّقَوْمٍ يُؤْمِنُونَ ﴿٥٣﴾

54. එහි (අනතුරු ඇඟවීම්) ඉටුවීම පමණක් ඔවුන් බලාපොරොත්තු වන්නේද? එහි ඉටුවීම සිදුවන්නාවූ දිනයේදී මෙයට පෙර අමතක වූ අය 'අපගේ අධිපතියාණන්ගේ දූතයෝ සැබැවින්ම සත්‍යය ගෙන ආහ. එසේ නම් අප වෙනුවෙන් මැදිහත්වීමට කිසියම් මැදිහත්කරුවන් අපට ඇත්තේද? නැතහොත් අප කරමින් සිටි දේට අමතරව අන් දේ (ක්‍රියාවන්) අප කිරීම සඳහා ආපසු අපි යවනු ලබන්නේදැ?'යි පවසන්නෝය. ඔවුහු

هَلْ يَنظُرُونَ إِلَّا تَأْوِيلَهُۥ ۚ يَوْمَ يَأْتِى تَأْوِيلُهُۥ يَقُولُ ٱلَّذِينَ نَسُوهُ مِن قَبْلُ قَدْ جَآءَتْ رُسُلُ رَبِّنَا بِٱلْحَقِّ فَهَل لَّنَا مِن شُفَعَآءَ فَيَشْفَعُوا۟ لَنَآ أَوْ نُرَدُّ فَنَعْمَلَ غَيْرَ ٱلَّذِى كُنَّا نَعْمَلُ ۚ قَدْ خَسِرُوٓا۟

أَنفُسَهُمْ وَضَلَّ عَنْهُم مَّا كَانُوا
يَفْتَرُونَ ﴿٥٤﴾

ඔවුන්ගේ ආත්මයන් ඇත්තවශයෙන්ම විනාශ කර ගත්තෝය. තවද ඔවුන් ගොතමින් සිටි දේ ඔවුන්ට ඵලක් නොවීය.

إِنَّ رَبَّكُمُ اللَّهُ الَّذِي خَلَقَ السَّمَاوَاتِ
وَالْأَرْضَ فِي سِتَّةِ أَيَّامٍ ثُمَّ اسْتَوَىٰ عَلَى
الْعَرْشِ يُغْشِي اللَّيْلَ النَّهَارَ يَطْلُبُهُ
حَثِيثًا وَالشَّمْسَ وَالْقَمَرَ وَالنُّجُومَ
مُسَخَّرَاتٍ بِأَمْرِهِ ۗ أَلَا لَهُ الْخَلْقُ
وَالْأَمْرُ ۗ تَبَارَكَ اللَّهُ رَبُّ الْعَالَمِينَ ﴿٥٥﴾

55. නියතවශයෙන්ම නුඹලාගේ අධිපතියාණන් අල්ලාහ්ය. ඔහු අහස් සහ පොළොව කාලපරිච්ඡේද හයකින් නිර්මාණය කළේය. පසුව ඔහු, තමන්ව සිංහාසනයේ ස්ථාවර කර ගත්තේය. ඔහු රැයෙන් දහවල ආවරණය කරයි. එය සීඝ්‍රයෙන් අනෙක ග්‍රහණය කරයි. තවද සිය විධානයට (සියල්ල) යටත් වන පරිදි ඉරද හඳද තාරකාවන්ද (ඔහු මැව්වේය). සැබැවින්ම මැවීම සහ විධානය ඔහුගේමය. සර්වලෝකයන්ටම අධිපතියාණන් වන අල්ලාහ් ආශිර්වාදයෙන් පරිපූර්ණය.

ادْعُوا رَبَّكُمْ تَضَرُّعًا وَخُفْيَةً ۚ إِنَّهُ
لَا يُحِبُّ الْمُعْتَدِينَ ﴿٥٦﴾

56. නිහතමානිව සහ රහසිගතව නුඹලාගේ අධිපතියාණන්ව කැඳවනු. නියතවශයෙන්ම ඔහු සීමාව ඉක්මවන්නන්ව ප්‍රිය නොකරයි.

وَلَا تُفْسِدُوا فِي الْأَرْضِ بَعْدَ إِصْلَاحِهَا
وَادْعُوهُ خَوْفًا وَطَمَعًا ۚ إِنَّ رَحْمَتَ اللَّهِ
قَرِيبٌ مِّنَ الْمُحْسِنِينَ ﴿٥٧﴾

57. තවද එහි සංශෝධනයෙන් පසු පොළොවෙහි කලබල ඇති නොකරනු. තවද බියෙන් සහ අපේක්ෂාවෙන් ඔහුව අයැදිනු. නියතවශයෙන්ම යහපත් ක්‍රියා කරන්නන් හට අල්ලාහ්ගේ දයාව සමීපය.

وَهُوَ الَّذِي يُرْسِلُ الرِّيَاحَ بُشْرًا بَيْنَ يَدَيْ
رَحْمَتِهِ ۖ حَتَّىٰ إِذَا أَقَلَّتْ سَحَابًا ثِقَالًا
سُقْنَاهُ لِبَلَدٍ مَّيِّتٍ فَأَنزَلْنَا بِهِ الْمَاءَ
فَأَخْرَجْنَا بِهِ مِن كُلِّ الثَّمَرَاتِ ۚ كَذَٰلِكَ
نُخْرِجُ الْمَوْتَىٰ لَعَلَّكُمْ تَذَكَّرُونَ ﴿٥٨﴾

58. තවද ඔහුගේ දයාවට පෙරාතුව ශුභාරංචි ලෙස සුළං යවන්නේ ඔහුමය. එවිට ඒවා ඝන වළාකුලක් උසුලනතාක් අපි මළ දේශයක් කරා එය ගෙන යන්නෙමු. ඉන්පසු අපි එයින් ජලය පහළ කරන්නෙමු. තවද අපි එයින් සියළු ආකාරයේ පළතුරු බිහි කරන්නෙමු. මේ ආකාරයට නුඹලා සිහි තබා ගනු පිණිස අපි මළවුන්ව පිටතට ගන්නෙමු.

59. තවද හොඳ භූමියක් (ගත්කළ) එහි ගස් කොළන් (බහුලව) බිහි වෙන්නේ සිය අධිපතියාණන්ගේ විධානයෙන්ය. තවද නරකක් ගත්කළ (එහි ගස් කොළන්) බිහි වෙන්නේ නිෂ්ඵලව මිස නොවේ. මේ ආකාරයට ජනතාව කෘතඥ වනු පිණිස අපි සලකුණු විවිධාකාරව දක්වන්නෙමු.

وَالْبَلَدُ الطَّيِّبُ يَخْرُجُ نَبَاتُهٗ بِاِذْنِ رَبِّهٖ ۚ وَالَّذِىْ خَبُثَ لَا يَخْرُجُ اِلَّا نَكِدًا ۗ كَذٰلِكَ نُصَرِّفُ الْاٰيٰتِ لِقَوْمٍ يَّشْكُرُوْنَ ۝٥٩

60. අපි නූහ්ව ඔහුගේ ජනතාව වෙත යැව්වෙමු. තවද ඔහු 'එම්බල මාගේ ජනතාවනි අල්ලාහ්ව නමදිනු. නුඹලාට ඔහු හැර නැමදීමට සුදුස්සෙක් අන් කිසිවෙක් නොමැත. සැබැවින්ම නුඹලා මත වූ අති මහත් වූ දිනයෙහි දඬුවමට මම බිය වන්නෙමි'යි කීවේය.

لَقَدْ اَرْسَلْنَا نُوْحًا اِلٰى قَوْمِهٖ فَقَالَ يٰقَوْمِ اعْبُدُوا اللّٰهَ مَا لَكُمْ مِّنْ اِلٰهٍ غَيْرُهٗ ۗ اِنِّىْٓ اَخَافُ عَلَيْكُمْ عَذَابَ يَوْمٍ عَظِيْمٍ ۝٦٠

61. ඔහුගේ ජනතාවගේ ප්‍රධානීහු 'නියතවශයෙන්ම අපි ඔබව ප්‍රත්‍යක්ෂ දුර්මාර්ගයෙහි දකිමු'යි කීහ.

قَالَ الْمَلَاُ مِنْ قَوْمِهٖٓ اِنَّا لَنَرٰىكَ فِىْ ضَلٰلٍ مُّبِيْنٍ ۝٦١

62. ඔහු 'එම්බල මාගේ ජනතාවනි! කිසිදු නොමග යාමක් මා තුල නොමැත. නමුත් මම සර්වලෝක අධිපතියාණන්ගෙන් වූ දූතයෙකු වෙමි'යි කීවේය.

قَالَ يٰقَوْمِ لَيْسَ بِىْ ضَلٰلَةٌ وَّلٰكِنِّىْ رَسُوْلٌ مِّنْ رَّبِّ الْعٰلَمِيْنَ ۝٦٢

63. 'මාගේ අධිපතියාණන්ගේ පණිවිඩය මම නුඹලා වෙත දන්වමි. තවද නුඹලාට යහපත් දැනමුතුකම් දෙමි. තවද නුඹලා නොදන්නා දේ මම අල්ලාහ්ගෙන් දැන ගනිමි'.

اُبَلِّغُكُمْ رِسٰلٰتِ رَبِّىْ وَاَنْصَحُ لَكُمْ وَاَعْلَمُ مِنَ اللّٰهِ مَا لَا تَعْلَمُوْنَ ۝٦٣

64. 'නුඹලාට අවවාද කරනු පිණිසත් නුඹලා බිය බැතිමත් වනු පිණිසත් නුඹලාට දයාව දක්වනු ලැබීම පිණිසත් නුඹලා අතරින්ම එක් මිනිසෙකු මගින් නුඹලාගේ අධිපතියාණන්ගෙන් අනුශාසනාවක් නුඹලා වෙතට පැමිණීම ගැනත් නුඹලා පුදුම වන්නේද?'

اَوَعَجِبْتُمْ اَنْ جَآءَكُمْ ذِكْرٌ مِّنْ رَّبِّكُمْ عَلٰى رَجُلٍ مِّنْكُمْ لِيُنْذِرَكُمْ وَلِتَتَّقُوْا وَلَعَلَّكُمْ تُرْحَمُوْنَ ۝٦٤

65. නමුත් ඔවුහු ඔහුව ප්‍රතික්ෂේප කළහ. එබැවින් අපි ඔහුවත් ඔහු සමග නැවෙහි සිටි අයවත් බේරා ගත්තෙමු. තවද අපගේ සලකුණු ප්‍රතික්ෂේප කළ අයව අපි ගිල්වා දැමුවෙමු. සැබැවින්ම ඔවුහු අන්ධ ජනතාවක් වූහ.

فَكَذَّبُوهُ فَأَنجَيْنَاهُ وَالَّذِينَ مَعَهُ فِي الْفُلْكِ وَأَغْرَقْنَا الَّذِينَ كَذَّبُوا بِآيَاتِنَا ۚ إِنَّهُمْ كَانُوا قَوْمًا عَمِينَ ﴿٦٥﴾

66. තවද ආද් වෙත ඔහුගේ සොහොයුරු හූද් ව (අපි යැව්වෙමු). 'එම්බල මාගේ ජනතාවනි, අල්ලාහ්ව නමදිනු, නුඹලාට ඔහු හැර නැමදීමට සුදුස්සෙකු අන්කිසිවෙක් නොමැත. ඉන් පසුවත් නුඹලා දෙවියන් කෙරෙහි බිය නොදක්වන්නෙහුද?' යි ඔහු කිවේය.

وَإِلَىٰ عَادٍ أَخَاهُمْ هُودًا ۗ قَالَ يَا قَوْمِ اعْبُدُوا اللَّهَ مَا لَكُم مِّنْ إِلَٰهٍ غَيْرُهُ ۚ أَفَلَا تَتَّقُونَ ﴿٦٦﴾

67. ඔහුගේ ජනයාගේ අවිශ්වාසිත ප්‍රධානීහු 'අපි නියත වශයෙන්ම ඔබව මෝඩකමෙහි (මුලා වූ බව) දකිමු. තවද අපි නියතවශයෙන්ම ඔබව මුසාවාදීන්ගෙන් (කෙනෙකු) යැයි සිතමු'යි කීහ.

قَالَ الْمَلَأُ الَّذِينَ كَفَرُوا مِن قَوْمِهِ إِنَّا لَنَرَاكَ فِي سَفَاهَةٍ وَإِنَّا لَنَظُنُّكَ مِنَ الْكَاذِبِينَ ﴿٦٧﴾

68. ඔහු 'එම්බල මාගේ ජනතාවනි! කිසිදු මෝඩකමක් මා තුල නොමැත. නමුත් මම සර්වලෝක අධිපතියාණන්ගෙන් වූ දූතයෙකු වෙමි'යි පිළිතුරු දුන්නේය.

قَالَ يَا قَوْمِ لَيْسَ بِي سَفَاهَةٌ وَلَٰكِنِّي رَسُولٌ مِّن رَّبِّ الْعَالَمِينَ ﴿٦٨﴾

69. 'මාගේ අධිපතියාණන්ගේ පණිවිඩය මම නුඹලා වෙත දන්වමි. තවද මම නුඹලාට අවංක මෙන්ම විශ්වාසනීය අනුශාසකයෙක් වෙමි'.

أُبَلِّغُكُمْ رِسَالَاتِ رَبِّي وَأَنَا لَكُمْ نَاصِحٌ أَمِينٌ ﴿٦٩﴾

70. 'නුඹලාට අවවාද කරනු පිණිස නුඹලා අතරින්ම මිනිසෙකු මගින් නුඹලාගේ අධිපතියාණන්ගේ අනුශාසනය නුඹලා වෙත එවා තිබීම ගැන නුඹලා පුදුමවන්නේද? නූහ්ගේ සමූහයෙන් පසු (ඔහුගේ අනුග්‍රහයන්ගේ) නියෝජිතයින් බවට ඔහු නුඹලාව පත්කර, නුඹලාව ශාරීරික වශයෙන් බහුලව ශක්තිමත් කළ අවස්ථාව සිහිපත් කරනු.

أَوَعَجِبْتُمْ أَن جَاءَكُمْ ذِكْرٌ مِّن رَّبِّكُمْ عَلَىٰ رَجُلٍ مِّنكُمْ لِيُنذِرَكُمْ ۚ وَاذْكُرُوا إِذْ جَعَلَكُمْ خُلَفَاءَ مِن بَعْدِ قَوْمِ نُوحٍ وَزَادَكُمْ فِي الْخَلْقِ بَسْطَةً ۖ فَاذْكُرُوا

اٰلَآءَ اللّٰهِ لَعَلَّكُمۡ تُفۡلِحُوۡنَ ﴿۷۰﴾

එබැවින් නුඹලා සමෘධිමත් වනු පිණිස අල්ලාහ්ගේ අනුග්‍රහයන් සිහිපත් කරනු.'

قَالُوۡۤا اَجِئۡتَنَا لِنَعۡبُدَ اللّٰهَ وَحۡدَهٗ وَنَذَرَ مَا كَانَ يَعۡبُدُ اٰبَآؤُنَا‌ ۚ فَاۡتِنَا بِمَا تَعِدُنَاۤ اِنۡ كُنۡتَ مِنَ الصّٰدِقِيۡنَ ﴿۷۱﴾

71. ඔවුන්, 'එකම අල්ලාහ්ට පමණක් අපි නැමදීමටත් අපගේ පියවරුන් නමදිමින් සිටි දේ අපි අත්හැර දැමීමටත් ඔබ අප වෙත පැමිණ සිටින්නේද? ඔබ සත්‍යවාදී නම් ඔබ කුමක් ගැන අප අවවාද කරමින් සිටියේද එය අපවෙත ගෙන එනු'යි කීහ.

قَالَ قَدۡ وَقَعَ عَلَيۡكُمۡ مِّنۡ رَّبِّكُمۡ رِجۡسٌ وَّغَضَبٌ‌ ؕ اَتُجَادِلُوۡنَنِىۡ فِىۡۤ اَسۡمَآءٍ سَمَّيۡتُمُوۡهَاۤ اَنۡتُمۡ وَاٰبَآؤُكُمۡ مَّا نَزَّلَ اللّٰهُ بِهَا مِنۡ سُلۡطٰنٍ‌ ؕ فَانْتَظِرُوۡۤا اِنِّىۡ مَعَكُمۡ مِّنَ الۡمُنۡتَظِرِيۡنَ ﴿۷۲﴾

72. ඔහු, 'නුඹලා (දැනටමත්) නුඹලාගේ අධිපතියාණන්ගෙන් දඬුවමට සහ උදහසට ඇත්තෙන්ම ලක්වී ඇත. මේ පිළිබඳව අල්ලාහ් කිසිඳු බලයක් පහළ කර නොතිබියදීත් නුඹලා සහ නුඹලාගේ පියවරුන් නම් කළ නාමයන් සම්බන්ධයෙන් නුඹලා මා සමඟ වාද කරන්නෙහුද? එසේ නම් බලා සිටිනු, මමද බලාසිටින්නන් අතර සිටිමි'යි පිළිතුරු දුන්නේය.

فَاَنۡجَيۡنٰهُ وَالَّذِيۡنَ مَعَهٗ بِرَحۡمَةٍ مِّنَّا وَقَطَعۡنَا دَابِرَ الَّذِيۡنَ كَذَّبُوۡا بِاٰيٰتِنَا‌ وَمَا كَانُوۡا مُؤۡمِنِيۡنَ ﴿۷۳﴾

73. අපගේ දයාවෙන් ඔහුවද ඔහු සමඟ සිටි අයවද අපි බේරා ගත්තෙමු. තවද අපගේ සලකුණු ප්‍රතික්ෂේප කළවුන්ගේ මුදුන්මුල අපි කපා හැරියෙමු. තවද ඔවුන් විශ්වාසිතයින් නොවූහ.

وَاِلٰى ثَمُوۡدَ اَخَاهُمۡ صٰلِحًا‌ ۘ قَالَ يٰقَوۡمِ اعۡبُدُوا اللّٰهَ مَا لَـكُمۡ مِّنۡ اِلٰهٍ غَيۡرُهٗ‌ ؕ قَدۡ جَآءَتۡكُمۡ بَيِّنَةٌ مِّنۡ رَّبِّكُمۡ‌ ؕ هٰذِهٖ نَاقَةُ اللّٰهِ لَـكُمۡ اٰيَةً‌ فَذَرُوۡهَا تَاۡكُلۡ فِىۡۤ اَرۡضِ اللّٰهِ‌ وَلَا تَمَسُّوۡهَا بِسُوۡٓءٍ فَيَاۡخُذَكُمۡ عَذَابٌ اَلِيۡمٌ ﴿۷۴﴾

74. සමූද්' වෙත ඔහුගේ සොහොයුරු සාලිහ්ව (අපි යැව්වෙමු). ඔහු, 'එම්බල මාගේ ජනතාවනි, අල්ලාහ්ව නමදිනු, ඔහු හැර වෙනත් දෙවියෙකු නොමැත. නියතවශයෙන්ම නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලා වෙත පැහැදිලි සාක්ෂියක් පැමිණ ඇත. එනම්, අල්ලාහ්ගේ මේ ඔටුදෙන නුඹලා සඳහා වූ සලකුණකි. එබැවින් අල්ලාහ්ගේ පොළොවෙහි ඇය අනුභව කරමින් සැරිසරන්නට ඇයට ඉඩ හරිනු. තවද ඇයට කිසිඳු හානියක් නොකරනු. නැතහොත් වේදනාකාරී දඬුවමක් නුඹලාව හසු කරගනියි'.

وَاذْكُرُوٓا إِذْ جَعَلَكُمْ خُلَفَآءَ مِنۢ بَعْدِ عَادٍ وَّبَوَّأَكُمْ فِى الْأَرْضِ تَتَّخِذُونَ مِن سُهُولِهَا قُصُورًا وَّتَنْحِتُونَ الْجِبَالَ بُيُوتًا ۚ فَاذْكُرُوٓا ءَالَآءَ اللَّهِ وَلَا تَعْثَوْا فِى الْأَرْضِ مُفْسِدِينَ ﴿٧٥﴾

75. 'තවද ආද්ගෙන් පසු (ඔහුගේ අනුග්‍රහයන්ගේ) නියෝජිතයින් බවට ඔහු නුඹලාව පත්කළ අවස්ථාව සිහිපත් කරනු. තවද ඔහු පොළෝ තළයෙහි නුඹලාට වාසස්ථානයක් සැලැස්සුවේය. නුඹලා එම සමතලා බිමෙහි මාලිගා තැනුවෙහුය. තවද නුඹලා නිවාස තැනීම සඳහා කඳු හැරුවෙහුය. එබැවින් අල්ලාහ්ගේ අනුග්‍රහයන් සිහිපත් කරනු. තවද අයුක්තිගරුක වෙමින් පොළොවෙහි කලබල ඇති නොකරනු'.

قَالَ الْمَلَأُ الَّذِينَ اسْتَكْبَرُوا مِن قَوْمِهِۦ لِلَّذِينَ اسْتُضْعِفُوا لِمَنْ ءَامَنَ مِنْهُمْ أَتَعْلَمُونَ أَنَّ صَٰلِحًا مُّرْسَلٌ مِّن رَّبِّهِۦ ۚ قَالُوٓا إِنَّا بِمَآ أُرْسِلَ بِهِۦ مُؤْمِنُونَ ﴿٧٦﴾

76. ඔහුගේ ජනතාව අතර උඩඟු වූ ප්‍රධානීන්, විශ්වාස කළ අය අතුරින් දුර්වලයන් ලෙස සලකනු ලැබූ අයට 'සාලිහ් ඔහුගේ අධිපතියාණන් විසින් එවන ලද්දකු යැයි නුඹලා (නියත වශයෙන්ම) දන්නෙහුදැ?'යි කීහ. 'ඇත්තෙන්ම ඔහු කුමක් සමග එවන ලද්දේද, ඒ පිළිබඳව අපි විශ්වාස කරමු.'යි ඔවුහු පිළිතුරු දුන්හ.

قَالَ الَّذِينَ اسْتَكْبَرُوٓا إِنَّا بِالَّذِىٓ ءَامَنتُم بِهِۦ كَٰفِرُونَ ﴿٧٧﴾

77. උඩඟු වූ අය, 'ඇත්තෙන්ම නුඹලා විශ්වාස කරන දෙයෙහි අපි විශ්වාස නොකරන්නෙමු'යි කීහ.

فَعَقَرُوا النَّاقَةَ وَعَتَوْا عَنْ أَمْرِ رَبِّهِمْ وَقَالُوا يَٰصَٰلِحُ ائْتِنَا بِمَا تَعِدُنَآ إِن كُنتَ مِنَ الْمُرْسَلِينَ ﴿٧٨﴾

78. අනතුරුව ඔවුහු ඔටු දෙනගේ කලවේ නහරය කපා, තම අධිපතියාණන්ගේ විධානයට අවනත නොවෙමින්, 'එම්බල සාලිහ් ඔබ (ඇත්තවශයෙන්ම) දූතයින්ගෙන් (කෙනෙකු) වේ නම් ඔබ කුමක් ගැන අපට අවවාද කරමින් සිටින්නේද එය අපවෙත ගෙන එනු'යි කීහ.

فَأَخَذَتْهُمُ الرَّجْفَةُ فَأَصْبَحُوا فِى دَارِهِمْ جَٰثِمِينَ ﴿٧٩﴾

79. මේ හේතුවෙන් ඔවුන්ව භූමිකම්පාව ග්‍රහණය කරගත්තේය. එම නිසා ඔවුන් ඔවුන්ගේ නිවෙස් තුළ මුණින් වැටී මළකඳන් බවට පත්වූහ.

فَتَوَلَّىٰ عَنْهُمْ وَقَالَ يَٰقَوْمِ لَقَدْ أَبْلَغْتُكُمْ رِسَالَةَ رَبِّى وَنَصَحْتُ لَكُمْ وَلَٰكِن لَّا

80. අනතුරුව (සාලිහ්) ඔවුන්ගෙන් ඉවත්වී, 'එම්බල මාගේ ජනතාවනි, මාගේ අධිපතියාණන්ගේ පණිවුඩය මම නුඹලා වෙත දැනුම්

تُحِبُّوْنَ النّٰصِحِيْنَ ۝٨٠

දුන්නෙමි. තවද නුඹලාට අවංකව අනුශාසනා කළෙමි. එහෙත් නුඹලා අවංක අනුශාසකයින්ව ප්‍රිය නොකරන්නෙහු යැ'යි කීවේය.

وَلُوْطًا اِذْ قَالَ لِقَوْمِهٖٓ اَتَاْتُوْنَ الْفَاحِشَةَ مَا سَبَقَكُمْ بِهَا مِنْ اَحَدٍ مِّنَ الْعٰلَمِيْنَ ۝٨١

81. තවද ලූත්ව (අපි යැව්වෙමු). එවිට ඔහු 'නුඹලාට කලින් ලෝකයේ කිසිවෙකු කිසිවිටෙකත් නොකළ නින්දිත දෙයක් නුඹලා කරන්නෙහුදැ?'යි තම ජනතාවට කීවේය.

اِنَّكُمْ لَتَاْتُوْنَ الرِّجَالَ شَهْوَةً مِّنْ دُوْنِ النِّسَاۤءِ ۗ بَلْ اَنْتُمْ قَوْمٌ مُّسْرِفُوْنَ ۝٨٢

82. 'ගැහැණුන් වෙනුවට පිරිමින් වෙත නුඹලා කාමතෘෂ්ණාවෙන් යුතුව ලංවන්නාහුය. මක්නිසාදයත් නුඹලා (සියළු) සීමාවන් ඉක්මවා යන ජනතාවකි.'

وَمَا كَانَ جَوَابَ قَوْمِهٖٓ اِلَّآ اَنْ قَالُوْٓا اَخْرِجُوْهُمْ مِّنْ قَرْيَتِكُمْ ۚ اِنَّهُمْ اُنَاسٌ يَّتَطَهَّرُوْنَ ۝٨٣

83. තවද ඔහුගේ ජනතාවගේ පිළිතුර මෙය හැර අන්කිසිවක් නොවීය. එනම් 'ඔවුන් තමන්ගේ පවිත්‍ර බව අඟවන්නාවූ පිරිසක් බැවින් නුඹලාගේ නගරයෙන් ඔවුන්ව පන්නා දමනු' යන්නය.

فَاَنْجَيْنٰهُ وَاَهْلَهٗٓ اِلَّا امْرَاَتَهٗ ۖ كَانَتْ مِنَ الْغٰبِرِيْنَ ۝٨٤

84. තවද ඔහුගේ භාර්යාව හැර ඔහු සහ ඔහුගේ පවුල අපි මුදා ගත්තෙමු. ඇය පසුබට වූවන්ගෙන් විය.

وَاَمْطَرْنَا عَلَيْهِمْ مَّطَرًا ۗ فَانْظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الْمُجْرِمِيْنَ ۝٨٥

85. අපි ඔවුන් මත වර්ෂාවක් වැස්සුවෙමු. පාපකාරීන්ගේ අවසානය කුමක් වූවා දැයි දැන් බලන්න.

وَاِلٰى مَدْيَنَ اَخَاهُمْ شُعَيْبًا ۗ قَالَ يٰقَوْمِ اعْبُدُوا اللّٰهَ مَا لَكُمْ مِّنْ اِلٰهٍ غَيْرُهٗ ۗ قَدْ جَاۤءَتْكُمْ بَيِّنَةٌ مِّنْ رَّبِّكُمْ فَاَوْفُوا الْكَيْلَ وَالْمِيْزَانَ وَلَا تَبْخَسُوا النَّاسَ

86. තවද මද්යන් (වරුන්) වෙත ඔවුන්ගේ සොහොයුරුවූ ෂුඅයිබ්ව (අපි යැව්වෙමු). ඔහු (මෙසේ) කීවේය. 'එම්බල මාගේ ජනතාවනි, අල්ලාහ්ව නමදිනු. නුඹලාට ඔහු හැර අන් දෙවියකු නොමැත. නුඹලාගේ අධිපතියාණන්ගෙන් පැහැදිලි සලකුණක් නුඹලා වෙත නියතවශයෙන්ම පැමිණ ඇත. එහෙයින් මිනුමද කිරුමද පූර්ණව

දෙනු. තවද ජනතාවට ඔවුන්ට හිමි දේ අඩු නොකර දෙනු. තවද එහි සංශෝධනයෙන් පසු පොළොවෙහි කලබල ඇති නොකරනු. නුඹලා විශ්වාසීන් වේ නම් එය නුඹලාට වඩා යහපත් වේ'.

أَشْيَآءَهُمْ وَلَا تُفْسِدُوا۟ فِى ٱلْأَرْضِ بَعْدَ إِصْلَٰحِهَا ۚ ذَٰلِكُمْ خَيْرٌ لَّكُمْ إِن كُنتُم مُّؤْمِنِينَ ﴿٨٦﴾

87. 'අල්ලාහ්ගේ මාර්ගයේ ඔහුව විශ්වාස කළ අයව බියගන්වමින් හා ඉවත් කරවමින්, තවද ඇද කිරීමේ අදහසින් සෑම මාර්ගයකම බාධාවක්ව නොසිටිනු. නුඹලා සුළුතරයක්ව සිටියදී ඔහු නුඹලාව බහුතරයක් කළ බව සිහි තබාගනු. තවද කලබල ඇතිකළවුන්ගේ අවසානය කුමක් වී දැයි බලනු?'

وَلَا تَقْعُدُوا۟ بِكُلِّ صِرَٰطٍ تُوعِدُونَ وَتَصُدُّونَ عَن سَبِيلِ ٱللَّهِ مَنْ ءَامَنَ بِهِۦ وَتَبْغُونَهَا عِوَجًا ۚ وَٱذْكُرُوٓا۟ إِذْ كُنتُمْ قَلِيلًا فَكَثَّرَكُمْ ۖ وَٱنظُرُوا۟ كَيْفَ كَانَ عَٰقِبَةُ ٱلْمُفْسِدِينَ ﴿٨٧﴾

88. 'තවද කුමක් සමග මා එවන ලද්දේද එය කෙරෙහි නුඹලා අතර එක් පිරිසක් විශ්වාස කරන අතර තවත් පිරිසක් අවිශ්වාස කරන්නේ නම් අල්ලාහ් ඒ පිළිබඳව අප අතර තීරණයක් දෙනතුරු ඉවසිලිමත් වනු. ඔහු විනිශ්චයකරුවන්ගෙන් අති ශ්‍රේෂ්ඨය.'

وَإِن كَانَ طَآئِفَةٌ مِّنكُمْ ءَامَنُوا۟ بِٱلَّذِىٓ أُرْسِلْتُ بِهِۦ وَطَآئِفَةٌ لَّمْ يُؤْمِنُوا۟ فَٱصْبِرُوا۟ حَتَّىٰ يَحْكُمَ ٱللَّهُ بَيْنَنَا ۚ وَهُوَ خَيْرُ ٱلْحَٰكِمِينَ ﴿٨٨﴾

9 කොටස

89. ඔහුගේ මිනිසුන්ගෙන් උඩඟු වූ ප්‍රධානීහු 'එම්බල ෂුඅයිබ්, නියතවශයෙන්ම අපි නුඹවද නුඹ සමඟ විශ්වාස කරනවුන්වද අපගේ නගරයෙන් පලවා හරින්නෙමු, නැතිනම් නුඹලා අපගේ ආගම වෙත නැවත පැමිණිය යුතු යැයි' කීහ. (එයට) ඔහු 'අප අකමැතිවූවත් දැ?' යි කීවේය.

قَالَ ٱلْمَلَأُ ٱلَّذِينَ ٱسْتَكْبَرُوا۟ مِن قَوْمِهِۦ لَنُخْرِجَنَّكَ يَٰشُعَيْبُ وَٱلَّذِينَ ءَامَنُوا۟ مَعَكَ مِن قَرْيَتِنَآ أَوْ لَتَعُودُنَّ فِى مِلَّتِنَا ۚ قَالَ أَوَلَوْ كُنَّا كَٰرِهِينَ ﴿٨٩﴾

90. 'අල්ලාහ් විසින් අප ඉන් මුදවාගෙන තිබියදීත් නුඹලාගේ ආගමට (දැන්) අප ආපසු පැමිණියහොත්, අප අල්ලාහ්ට එරෙහිව සැබැවින්ම බොරු

قَدِ ٱفْتَرَيْنَا عَلَى ٱللَّهِ كَذِبًا إِنْ عُدْنَا فِى مِلَّتِكُم بَعْدَ إِذْ نَجَّىٰنَا ٱللَّهُ مِنْهَا ۚ وَمَا

يَكُونَ لَنَآ أَن نَّعُودَ فِيهَآ إِلَّآ أَن يَشَآءَ ٱللَّهُ رَبُّنَا ۚ وَسِعَ رَبُّنَا كُلَّ شَىْءٍ عِلْمًا ۚ عَلَى ٱللَّهِ تَوَكَّلْنَا ۚ رَبَّنَا ٱفْتَحْ بَيْنَنَا وَبَيْنَ قَوْمِنَا بِٱلْحَقِّ وَأَنتَ خَيْرُ ٱلْفَٰتِحِينَ ﴿٩٠﴾

ගොතන්නන් වන්නෙමු. එබැවින් අප අධිපතියාණන් වන අල්ලාහ් එයට කැමැති වුවොත් මිස එය වෙත ආපසු පැමිණීම අපට කිසිසේත් කළ හැක්කක් නොවේ. දැනුමෙන් අපගේ අධිපතියාණන් සර්ව ව්‍යාප්තකය. අපි අපගේ විශ්වාසය තබා ඇත්තේ අල්ලාහ් වෙතමය. එබැවින් අපගේ අධිපතියාණනි, අප හා අපගේ ජනතාව අතර සත්‍යයෙහි තීරණය ලබා දෙනු මැනව. ඔබ තීරණය කරන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨය.'

وَقَالَ ٱلْمَلَأُ ٱلَّذِينَ كَفَرُوا۟ مِن قَوْمِهِۦ لَئِنِ ٱتَّبَعْتُمْ شُعَيْبًا إِنَّكُمْ إِذًا لَّخَٰسِرُونَ ﴿٩١﴾

91. තවද ඔහුගේ අවිශ්වාසිත ජනතාවගේ ප්‍රධානීන් 'නුඹලා ෂුඅයිබ්ව අනුගමනය කළහොත් නියතවශයෙන්ම නුඹලා පාඩු විඳින්නන් වන්නෝයැ'යි කීහ.

فَأَخَذَتْهُمُ ٱلرَّجْفَةُ فَأَصْبَحُوا۟ فِى دَارِهِمْ جَٰثِمِينَ ﴿٩٢﴾

92. එබැවින් ඔවුන්ව භූමිකම්පාව ග්‍රහණය කරගත්තේය. තවද ඔවුන්ගේ නිවෙස් තුළ ඔවුන් පොළව මත මුණින් වැටී සිටියහ.

ٱلَّذِينَ كَذَّبُوا۟ شُعَيْبًا كَأَن لَّمْ يَغْنَوْا۟ فِيهَا ۛ ٱلَّذِينَ كَذَّبُوا۟ شُعَيْبًا كَانُوا۟ هُمُ ٱلْخَٰسِرِينَ ﴿٩٣﴾

93. ෂුඅයිබ් බොරු කී යැයි චෝදනා කළ අය කිසිදා එහි වාසය නොකළවුන් මෙන් (විනාශ) වූහ. ෂුඅයිබ් අසත්‍ය ප්‍රකාශකරන බවට චෝදනා කළ අයම පාඩු විඳින්නන් වූහ.

فَتَوَلَّىٰ عَنْهُمْ وَقَالَ يَٰقَوْمِ لَقَدْ أَبْلَغْتُكُمْ رِسَٰلَٰتِ رَبِّى وَنَصَحْتُ لَكُمْ ۖ فَكَيْفَ ءَاسَىٰ عَلَىٰ قَوْمٍ كَٰفِرِينَ ﴿٩٤﴾

94. අනතුරුව ඔහු ඔවුන්ගෙන් ඉවත්ව ගියේය. තවද ඔහු 'එම්බල මාගේ ජනතාවනි, නියතවශයෙන්ම මාගේ අධිපතියාණන්ගේ පණිවුඩයන් මම නුඹලා වෙත දෙමින් නුඹලාට අවංක අනුශාසනා කළෙමි. එසේනම් අවිශ්වාසිවූ ජනතාවක් වෙනුවෙන් මම දුක් වන්නේ කෙසේ දැයි?' කිවේය.

وَمَآ أَرْسَلْنَا فِى قَرْيَةٍ مِّن نَّبِىٍّ إِلَّآ أَخَذْنَآ أَهْلَهَا بِٱلْبَأْسَآءِ وَٱلضَّرَّآءِ لَعَلَّهُمْ يَضَّرَّعُونَ ﴿٩٥﴾

95. මිනිසුන් යටහත් පහත් වීම සඳහා ඔවුන්ව අපි දුක් පීඩාවට හසු කරගැනීමෙන් මිස අපි කිසිවිටෙක කිසිම නගරයකට වක්තෘවරයෙකු නොයැව්වෙමු.

96. පසුව අපි ඔවුන් (සමෘද්ධියෙන් සහ සංඛ්‍යාත්මකව) වර්ධනය වන තෙක් අපි (ඔවුන්ගේ) අයහපත යහපත් (තත්ත්වය) බවට හැරවීමෙමු. තවද ඔවුන් 'අපගේ පියවරුන්ටද දුක හා සැප අත්වී තිබේ.' යැයි පැවසුවේය. අනතුරුව ඔවුන් නොදැන සිටියදී අපි ඔවුන්ව ක්ෂණිකව හසු කරගත්තෙමු.

ثُمَّ بَدَّلْنَا مَكَانَ السَّيِّئَةِ الْحَسَنَةَ حَتّٰى عَفَوْا وَّقَالُوْا قَدْ مَسَّ اٰبَآءَنَا الضَّرَّآءُ وَالسَّرَّآءُ فَاَخَذْنٰهُمْ بَغْتَةً وَّهُمْ لَا يَشْعُرُوْنَ ﴿٩٦﴾

97. (එම) නගරවල ජනතාව විශ්වාස කර බියබැතිමත්ව සිටියේ නම්, නියතවශයෙන්ම අහසින්ද පොළොවෙන්ද ආශිර්වාදයන් ඔවුන් වෙත අප විසින් විවෘත කරන්නට තිබුණි. එහෙත් ඔවුහු අවිශ්වාස කළහ. එබැවින් ඔවුන් උපයාගනිමින් සිටි දේ හේතුකොටගෙන අපි ඔවුන්ව හසු කර ගත්තෙමු.

وَلَوْ اَنَّ اَهْلَ الْقُرٰٓى اٰمَنُوْا وَاتَّقَوْا لَفَتَحْنَا عَلَيْهِمْ بَرَكٰتٍ مِّنَ السَّمَآءِ وَالْاَرْضِ وَلٰكِنْ كَذَّبُوْا فَاَخَذْنٰهُمْ بِمَا كَانُوْا يَكْسِبُوْنَ ﴿٩٧﴾

98. (මෙම) නගරවාසීහු රාත්‍රී කාලයේදී නිදා සිටින අතරතුරදී ඔවුන් කරා පැමිණෙන අපගේ දඬුවමින් ඔවුන් සුරක්ෂිතව සිටිත්ද?

اَفَاَمِنَ اَهْلُ الْقُرٰٓى اَنْ يَّاْتِيَهُمْ بَاْسُنَا بَيَاتًا وَّهُمْ نَآئِمُوْنَ ﴿٩٨﴾

99. නැතහොත් (මෙම) නගරවාසීහු දිවා කාලයේදී ඔවුන් විනෝද වෙමින් සිටින අතරතුරදී ඔවුන් කරා පැමිණෙන අපගේ දඬුවමින් ඔවුන් සුරක්ෂිතව සිටිත්ද?

اَوَاَمِنَ اَهْلُ الْقُرٰٓى اَنْ يَّاْتِيَهُمْ بَاْسُنَا ضُحًى وَّهُمْ يَلْعَبُوْنَ ﴿٩٩﴾

100. ඔවුහු අල්ලාහ්ගේ සැලැස්මෙන් සුරක්ෂිතව සිටිත්ද? පාඩුවිඳින ජනතාව හැරෙන්නට අල්ලාහ්ගේ සැලැස්මෙන් සුරක්ෂිත යැයි නොහැඟෙන කිසිවෙක් නැත.

اَفَاَمِنُوْا مَكْرَ اللّٰهِ ۚ فَلَا يَاْمَنُ مَكْرَ اللّٰهِ اِلَّا الْقَوْمُ الْخٰسِرُوْنَ ﴿١٠٠﴾ ع

101. පොළොවට එහි පෙර පදිංචි කරුවන්ගේ ඇවෑමෙන් උරුමය ලැබූ අයට අප අභිමත වූයේ නම් ඔවුන්ගේ පව් හේතුවෙන් අපි ඔවුනට දඬුවම් දෙන්නෙමු. තවද අපි ඔවුන්ගේ හදවත්හි මුද්‍රා තබන්නෙමු. එහෙයින් ඔවුන් මගපෙන්වීමේ පුවතට සවන් නොදෙන්නේය යන දැනුම ඔවුනට නොලැබුණේද?

اَوَلَمْ يَهْدِ لِلَّذِيْنَ يَرِثُوْنَ الْاَرْضَ مِنْ بَعْدِ اَهْلِهَآ اَنْ لَّوْ نَشَآءُ اَصَبْنٰهُمْ بِذُنُوْبِهِمْ ۚ وَنَطْبَعُ عَلٰى قُلُوْبِهِمْ فَهُمْ لَا يَسْمَعُوْنَ ﴿١٠١﴾

102. එවන් නගරයන්හි පුවත් අප ඔබට පවසන්නෙමු. තවද ඔවුන්ගේ දූතයෝ පැහැදිලි සලකුණු සමග ඔවුන් වෙත සත්තකින්ම පැමිණියහ. එහෙත් ඔවුන් කලින් බොරු කළ දේ ඔවුන් විශ්වාස නොකරන්නෝය. මෙයාකාරයට අල්ලාහ් අවිශ්වාසිතයින්ගේ හදවත්හි මුද්‍රා තබන්නේය.

تِلْكَ الْقُرٰى نَقُصُّ عَلَيْكَ مِنْ اَنْۢبَآئِهَا ۚ وَلَقَدْ جَآءَتْهُمْ رُسُلُهُمْ بِالْبَيِّنٰتِ ۚ فَمَا كَانُوْا لِيُؤْمِنُوْا بِمَا كَذَّبُوْا مِنْ قَبْلُ ۗ كَذٰلِكَ يَطْبَعُ اللّٰهُ عَلٰى قُلُوْبِ الْكٰفِرِيْنَ ﴿١٠٢﴾

103. තවද අපි ඔවුන්ගෙන් බොහෝ අයව ප්‍රතිඥාව (පිළිපැදීමෙ)හි කිසිදු සැළකිල්ලක් නොදක්වන බව දුටුවෙමු. තවද නියතවශයෙන්ම ඔවුන්ගෙන් බොහෝ අයව පාපකාරීන් බව අපි දුටුවෙමු.

وَمَا وَجَدْنَا لِاَكْثَرِهِمْ مِّنْ عَهْدٍ ۚ وَاِنْ وَّجَدْنَآ اَكْثَرَهُمْ لَفٰسِقِيْنَ ﴿١٠٣﴾

104. ඉන් අනතුරුව ඔවුන්ට පසුව ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් වෙත අපගේ සලකුණු සමග අපි මූසාව යැව්වෙමු. එහෙත් ඔවුහු ඒවා අයුතු ලෙස (ප්‍රතික්ෂේප) කළහ. පසුව කෝලාහල ඇති කළවුන්ගේ අවසානය කෙසේ වූවේදැයි බලන්න!

ثُمَّ بَعَثْنَا مِنْۢ بَعْدِهِمْ مُّوْسٰى بِاٰيٰتِنَآ اِلٰى فِرْعَوْنَ وَمَلَا۟ئِهٖ فَظَلَمُوْا بِهَا ۚ فَانْظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الْمُفْسِدِيْنَ ﴿١٠٤﴾

.
105. තවද මූසා 'එම්බා ෆිර්අවුන්, (ඇත්තවශයෙන්ම), මම සර්ව ලෝකයන්ටම අධිපතියාණන්ගෙන් දූතයෙක් වෙමි'යි කීවේය.

وَقَالَ مُوْسٰى يٰفِرْعَوْنُ اِنِّيْ رَسُوْلٌ مِّنْ رَّبِّ الْعٰلَمِيْنَ ۙ﴿١٠٥﴾

106. 'අල්ලාහ් ගැන සත්‍යය හැරෙන්නට අන් කිසිවක් පැවසීමට මා සුදුසු නොවෙමි. ඔබගේ අධිපතියාණන්ගෙන් පැහැදිලි සලකුණක් සමග මම නුඹලා වෙත පැමිණ ඇත්තෙමි. එබැවින් ඉස්රාඊල්ගේ දරුවන් මා සමග එවනු'.

حَقِيْقٌ عَلٰٓى اَنْ لَّآ اَقُوْلَ عَلَى اللّٰهِ اِلَّا الْحَقَّ ۗ قَدْ جِئْتُكُمْ بِبَيِّنَةٍ مِّنْ رَّبِّكُمْ فَاَرْسِلْ مَعِيَ بَنِيْٓ اِسْرَآءِيْلَ ۗ﴿١٠٦﴾

107. 'ඔබ සත්තකින්ම සලකුණක් සමග පැමිණ ඇත්තේ නම්, ඔබ සත්‍යවාදීන්ගෙන් නම්, එය ගෙනහැර දක්වන්නැ' යි (ෆිර්අවුන්) පිළිතුරු දුන්නේය.

قَالَ اِنْ كُنْتَ جِئْتَ بِاٰيَةٍ فَأْتِ بِهَآ اِنْ كُنْتَ مِنَ الصّٰدِقِيْنَ ﴿١٠٧﴾

108. පසුව ඔහු සිය සැරයටිය බිම විසිකෙරුවේය. සැනකින්ම! එය සර්පයෙකුසේ පැහැදිලිව දිස්විය.

فَاَلْقٰى عَصَاهُ فَاِذَا هِىَ ثُعْبَانٌ مُّبِيْنٌ ۚ ۖ ﴿۱۰۸﴾

109. තවද ඔහු තම අත එළියට ගත්තේය. මෙන්න! නරඹන්නන්ට එය සුදට පෙනුණි.

وَّنَزَعَ يَدَهٗ فَاِذَا هِىَ بَيْضَآءُ لِلنّٰظِرِيْنَ ﴿۱۰۹﴾ ع

110. 'නියතවශයෙන්ම, මොහු ඉතාමත් දක්ෂ මන්ත්‍රකාරයෙකු යැ'යි ෆිර්අවුන්ගේ ජනයාගෙන් ප්‍රධානීහු කීහ.

قَالَ الْمَلَاُ مِنْ قَوْمِ فِرْعَوْنَ اِنَّ هٰذَا لَسٰحِرٌ عَلِيْمٌ ۙ ﴿۱۱۰﴾

111. 'නුඹලාගේ භූමියෙන් නුඹලාව ඉවත් කිරීමට ඔහු කැමති වන්නේය. නුඹලා දැන් කුමක් යෝජනා කරන්නෙහුද?'

يُّرِيْدُ اَنْ يُّخْرِجَكُمْ مِّنْ اَرْضِكُمْ ۚ فَمَاذَا تَاْمُرُوْنَ ﴿۱۱۱﴾

112. 'ඔහුටත් ඔහුගේ සහෝදරයාටත් (කාල අවකාශයක්) ලබා දෙන්න. තවද නගරයන්හි කැඳවන්නන් යවන්නැ' යි ඔවුහු කීහ.

قَالُوْۤا اَرْجِهْ وَاَخَاهُ وَاَرْسِلْ فِى الْمَدَآئِنِ حٰشِرِيْنَ ۙ ﴿۱۱۲﴾

113. 'ඔවුන් හැම දක්ෂ මන්ත්‍රකරුවකුම ඔබ වෙත ගෙන ආ යුතුය.'

يَاْتُوْكَ بِكُلِّ سٰحِرٍ عَلِيْمٍ ﴿۱۱۳﴾

114. මන්ත්‍රකරුවන් ෆිර්අවුන් වෙත පැමිණ 'අප දිනුවේ නම් නිසැකවම අපි තිළිණ ලබන්නෙමු' යැයි (ද) කීහ.

وَجَآءَ السَّحَرَةُ فِرْعَوْنَ قَالُوْۤا اِنَّ لَنَا لَاَجْرًا اِنْ كُنَّا نَحْنُ الْغٰلِبِيْنَ ﴿۱۱۴﴾

115. 'එසේය, නුඹලාද (මාහට) සමීප වූවන්ගෙන් බවට පත්වන්නෙහුයැ'යි ඔහු කීවේය.

قَالَ نَعَمْ وَاِنَّكُمْ لَمِنَ الْمُقَرَّبِيْنَ ﴿۱۱۵﴾

116. 'එම්බල මූසා ඔබ (මුලින්) විසි කරන්නේද නැතහොත් අප (මුලින්) විසි කරන්නන් විය යුතුදැ'යි ඔවුහු පැවසූහ.

قَالُوْا يٰمُوْسٰۤى اِمَّاۤ اَنْ تُلْقِىَ وَاِمَّاۤ اَنْ نَّكُوْنَ نَحْنُ الْمُلْقِيْنَ ﴿۱۱۶﴾

117. 'නුඹලාම විසිකරනු'යි ඔහු පිළිතුරු දුන්නේය. තවද ඔවුන් විසිකළ විට ඒවා ජනයාගේ ඇස් මෝහනය කරගත්තේය. තවද ඔවුන්ව බිය ගන්වා මහත් විජ්ජාවක්ද ඔවුහු ගෙන හැර පෑහ.

قَالَ اَلْقُوْا ۚ فَلَمَّاۤ اَلْقَوْا سَحَرُوْۤا اَعْيُنَ النَّاسِ وَاسْتَرْهَبُوْهُمْ وَجَآءُوْ بِسِحْرٍ عَظِيْمٍ ﴿۱۱۷﴾

وَأَوْحَيْنَآ إِلَىٰ مُوسَىٰٓ أَنْ أَلْقِ عَصَاكَ ۖ فَإِذَا هِىَ تَلْقَفُ مَا يَأْفِكُونَ ﴿١١٨﴾

118. 'ඔබගෙ' සැරයටිය විසිකරන්නැ'යි (පවසමින්) අපි මූසාව පෙළඹවීමු. මෙන්න! ඔවුන් මවා පෑ දේ එය ගිල දමන්නට විය.

فَوَقَعَ ٱلْحَقُّ وَبَطَلَ مَا كَانُوا۟ يَعْمَلُونَ ﴿١١٩﴾

119. එබැවින් සත්‍යය තහවුරු විය. තවද ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵලව සනාථ විය.

فَغُلِبُوا۟ هُنَالِكَ وَٱنقَلَبُوا۟ صَٰغِرِينَ ﴿١٢٠﴾

120. මේ ආකාරයට ඔවුහු එතැන් හිදි පරාජය කරනු ලැබූහ. තවද ඔවුහු නින්දිතව හැරී ගියහ.

وَأُلْقِىَ ٱلسَّحَرَةُ سَٰجِدِينَ ﴿١٢١﴾

121. තවද මන්ත්‍රකරුවන් අවනතව දණින් වැටීමට පොළඹවන ලදි.

قَالُوٓا۟ ءَامَنَّا بِرَبِّ ٱلْعَٰلَمِينَ ﴿١٢٢﴾

122. (තවද) ඔවුහු 'අපි සර්ව ලෝකයන්හි අධිපතියාණන්ව විශ්වාස කරන්නෙමු'යි කීහ.

رَبِّ مُوسَىٰ وَهَٰرُونَ ﴿١٢٣﴾

123. (ඔහු) මූසාගේ සහ හාරූන්ගේ අධිපතියාණන්ය.

قَالَ فِرْعَوْنُ ءَامَنتُم بِهِۦ قَبْلَ أَنْ ءَاذَنَ لَكُمْ ۖ إِنَّ هَٰذَا لَمَكْرٌ مَّكَرْتُمُوهُ فِى ٱلْمَدِينَةِ لِتُخْرِجُوا۟ مِنْهَآ أَهْلَهَا ۖ فَسَوْفَ تَعْلَمُونَ ﴿١٢٤﴾

124. 'මා නුඹලාට අවසර දීමටත් පෙර නුඹලා ඔහු කෙරෙහි විශ්වාස කළෙහිද, නියතවශයෙන්ම මෙය කුමන්ත්‍රණයකි. නුඹලා මෙම නගරයේ එහි වැසියන්ව එයින් පිටමං කිරීම සඳහා නුඹලා කුමන්ත්‍රණය කළෙහුය. එහෙත් නුඹලා ඉක්මනින්ම (එහි විපාක) දැනගන්නෙහුයැ'යි ෆිර්අවුන් කීවේය.

لَأُقَطِّعَنَّ أَيْدِيَكُمْ وَأَرْجُلَكُم مِّنْ خِلَٰفٍ ثُمَّ لَأُصَلِّبَنَّكُمْ أَجْمَعِينَ ﴿١٢٥﴾

125. 'නියතවශයෙන්ම මම නුඹලාගේ අත් සහ නුඹලාගේ පාදයන් ඒකාන්තර පැතිවලට කපා හරින්නෙමි. ඉක්බිතිව මම නුඹලා සියල්ලන්ටම කුරුසයේ දඬුවම දෙමි' (යැයිද කීවේය).

قَالُوٓا۟ إِنَّآ إِلَىٰ رَبِّنَا مُنقَلِبُونَ ﴿١٢٦﴾

126. 'ඉන්පසු අපි අපගේ අධිපතියාණන් වෙත ආපසු යන්නෙමු' යි ඔවුහු පිළිතුරු දුන්නෝය.

وَمَا تَنْقِمُ مِنَّا إِلَّا أَنْ آمَنَّا بِآيَاتِ رَبِّنَا لَمَّا جَاءَتْنَا ۚ رَبَّنَا أَفْرِغْ عَلَيْنَا صَبْرًا وَتَوَفَّنَا مُسْلِمِينَ ﴿١٢٧﴾

127. 'තවද අපගේ අධිපතියාණන්ගේ සලකුණු, අප වෙත පැමිණි විට අප ඒවා කෙරෙහි විශ්වාස කර ඇත්තෙමු. එනිසා ඔබ අපගෙන් පළිගන්නෙහිද? අපගේ අධිපතියාණෙනි අපහට ඉවසිලිවන්ත භාවය දෙනු මැනව. තවද අපව (ඔබ වෙනුවෙන්) කැපකරුවන් වී සිටියදී මරණයට පත් කරනු මැනව'.

وَقَالَ الْمَلَأُ مِنْ قَوْمِ فِرْعَوْنَ أَتَذَرُ مُوسَىٰ وَقَوْمَهُ لِيُفْسِدُوا فِي الْأَرْضِ وَيَذَرَكَ وَآلِهَتَكَ ۚ قَالَ سَنُقَتِّلُ أَبْنَاءَهُمْ وَنَسْتَحْيِي نِسَاءَهُمْ وَإِنَّا فَوْقَهُمْ قَاهِرُونَ ﴿١٢٨﴾

128. තවද ෆිර්අවුන්ගේ ජනයාගේ ප්‍රධානීහු, 'භූමියෙහි කලබල ඇති කිරීමටත් නුඹ හා නුඹගේ දෙවිවරුන් හැරදැමීමටත් නුඹ මූසාටත් ඔහුගේ ජනයාටත් ඉඩ හරින්නෙහිදැ?'යි කීහ. ඔහු 'අපි ඔවුන්ගේ පුත්‍රයින් කෲර ලෙස මරා දමන්නෙමු තවද ඔවුන්ගේ ස්ත්‍රීන්ට ජීවත්වන්නට ඉඩ හරින්නෙමු. තවද නියතවශයෙන්ම අපි ඔවුන් අභිබවා සිටිමු'යි පිළිතුරු දුන්නේය.

قَالَ مُوسَىٰ لِقَوْمِهِ اسْتَعِينُوا بِاللَّهِ وَاصْبِرُوا ۖ إِنَّ الْأَرْضَ لِلَّهِ يُورِثُهَا مَنْ يَشَاءُ مِنْ عِبَادِهِ ۖ وَالْعَاقِبَةُ لِلْمُتَّقِينَ ﴿١٢٩﴾

129. මූසා තම ජනයා වෙත 'අල්ලාහ්ගෙන් පිහිට පතනු, තවද ඉවසිලිවන්ත වෙනු. සැබැවින්ම පොළොව අල්ලාහ්ගේය. ඔහු, තම දාසයින් අතරින් ඔහු කැමති අයට එය උරුමයක් වශයෙන් ලබාදෙන්නේය. තවද අවසානය දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන් සඳහායැ'යි කීවේය.

قَالُوا أُوذِينَا مِنْ قَبْلِ أَنْ تَأْتِيَنَا وَمِنْ بَعْدِ مَا جِئْتَنَا ۚ قَالَ عَسَىٰ رَبُّكُمْ أَنْ يُهْلِكَ عَدُوَّكُمْ وَيَسْتَخْلِفَكُمْ فِي الْأَرْضِ فَيَنْظُرَ كَيْفَ تَعْمَلُونَ ﴿١٣٠﴾

130. 'ඔබ අප වෙතට පැමිණෙන්නට පෙරත් ඔබ අප වෙතට පැමිණි පසුත් අපි වධ හිංසාවලට ලක්වීමු'යි ඔවුහු පිළිතුරු දුන්හ. 'නුඹලාගේ අධිපතියාණන් නුඹලාගේ සතුරාව විනාශකර දමන්නට ඉතා ආසන්නය. තවද භූමියෙහි නුඹලාව පාලකයන් කරන්නේ එමගින් නුඹලා කෙසේ කටයුතු කරන්නේදැයි ඔහු බලනු පිණිසයැ'යි ඔහු කීවේය.

وَلَقَدْ أَخَذْنَا آلَ فِرْعَوْنَ بِالسِّنِينَ

131. තවද ඔවුන් අනුශාසනා ලබාගනු පිණිස දිගු නියඟය සහ

وَنَقْصٍ مِّنَ الثَّمَرَاتِ لَعَلَّهُمْ يَذَّكَّرُونَ ﴿١٣١﴾

පළතුරු හිඟය මගින් අපි ෆිර්අවුන්ගේ ජනතාවට දඬුවම් දුනිමු.

فَإِذَا جَاءَتْهُمُ الْحَسَنَةُ قَالُوا لَنَا هَٰذِهِ ۖ وَإِن تُصِبْهُمْ سَيِّئَةٌ يَطَّيَّرُوا بِمُوسَىٰ وَمَن مَّعَهُ ۗ أَلَا إِنَّمَا طَائِرُهُمْ عِندَ اللَّهِ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿١٣٢﴾

132. එහෙත් ඔවුනට යහපතක් පැමිණි විට 'මෙය අප සඳහාවේ' යැයි ඔවුහු කියති. තවද ඔවුනට අයහපතක් අත්වූවිට, ඔවුහු එය මූසා සහ ඔහු සමග සිටි අයවෙත අභාග්‍යයක් යැයි ආරෝපණය කරති. බලනු, නියතවශයෙන්ම ඔවුන්ගේ අභාග්‍යය(ට හේතුව) අල්ලාහ් වෙතය, නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

وَقَالُوا مَهْمَا تَأْتِنَا بِهِ مِنْ آيَةٍ لِّتَسْحَرَنَا بِهَا فَمَا نَحْنُ لَكَ بِمُؤْمِنِينَ ﴿١٣٣﴾

133. තවද 'අපව වසඟ කිරීම සඳහා ඔබ අප වෙත කුමන හෝ සලකුණක් ගෙන දැක්වුවද අපි ඔබ කෙරෙහි විශ්වාසය කරන්නන් නොවන්නෙමු'යි ඔවුහු කීහ.

فَأَرْسَلْنَا عَلَيْهِمُ الطُّوفَانَ وَالْجَرَادَ وَالْقُمَّلَ وَالضَّفَادِعَ وَالدَّمَ آيَاتٍ مُّفَصَّلَاتٍ فَاسْتَكْبَرُوا وَكَانُوا قَوْمًا مُّجْرِمِينَ ﴿١٣٤﴾

134. එබැවින් ඔවුන් මත කුණාටුවක්ද, පළගැටියන්ද, උකුණන්ද, ගෙම්බන්ද, රුධිරයද පැහැදිලි සලකුණු වශයෙන් අපි යැව්වෙමු. එහෙත් ඔවුහු උඩඟු ලෙස හැසිරුණහ. තවද පාපකාරී ජනතාවක් වූහ.

وَلَمَّا وَقَعَ عَلَيْهِمُ الرِّجْزُ قَالُوا يَا مُوسَى ادْعُ لَنَا رَبَّكَ بِمَا عَهِدَ عِندَكَ ۖ لَئِن كَشَفْتَ عَنَّا الرِّجْزَ لَنُؤْمِنَنَّ لَكَ وَلَنُرْسِلَنَّ مَعَكَ بَنِي إِسْرَائِيلَ ﴿١٣٥﴾

135. තවද දඬුවම ඔවුනට අත්වූ විට, 'එම්බල මූසා, ඔහු (අධිපතියාණන්) ඔබ වෙත පොරොන්දු වී ඇති දේ අනුව ඔබගේ අධිපතියාණන්ගෙන් අප සඳහා අයදින්න. ඔබ අපගෙන් දඬුවම ඉවත් කළහොත් නියතවශයෙන්ම අපි ඔබව විශ්වාස කරන්නෙමු. තවද අපි නියතවශයෙන්ම ඉස්රාඊල්ගේ දරුවන්ව ඔබ සමග යවන්නෙමු'යි ඔවුහු කීහ.

فَلَمَّا كَشَفْنَا عَنْهُمُ الرِّجْزَ إِلَىٰ أَجَلٍ هُم

136. එහෙත් ඔවුන් ලඟාවීමට නියමිත කාල පරිච්ඡේදය වනතුරු

بٰلِغُوْهُ اِذَا هُمْ يَنْكُثُوْنَ ۝١٣٦

අපි දඬුවම ඔවුන්ගෙන් ඉවත් කළවිට, එසැනින්! ඔවුහු තමන්ගේ පොරොන්දුව කඩ කළහ.

فَانْتَقَمْنَا مِنْهُمْ فَاَغْرَقْنٰهُمْ فِى الْيَمِّ بِاَنَّهُمْ كَذَّبُوْا بِاٰيٰتِنَا وَكَانُوْا عَنْهَا غٰفِلِيْنَ ۝١٣٧

137. එබැවින් ඔවුන් අපගේ සළකුණු මුසාවක් ලෙස සැලකූ නිසාත් ඒවා ගැන නොතැකූ නිසාත් අපි ඔවුන්ගෙන් පළිගෙන ඔවුන්ව මුහුදෙහි ගිල්වා දැමුවෙමු.

وَاَوْرَثْنَا الْقَوْمَ الَّذِيْنَ كَانُوْا يُسْتَضْعَفُوْنَ مَشَارِقَ الْاَرْضِ وَمَغَارِبَهَا الَّتِىْ بٰرَكْنَا فِيْهَا ؕ وَتَمَّتْ كَلِمَتُ رَبِّكَ الْحُسْنٰى عَلٰى بَنِىْۤ اِسْرَآءِيْلَ ۙ بِمَا صَبَرُوْا ؕ وَدَمَّرْنَا مَا كَانَ يَصْنَعُ فِرْعَوْنُ وَقَوْمُهٗ وَمَا كَانُوْا يَعْرِشُوْنَ ۝١٣٨

138. තවද දුබලයන් ලෙස සලකනු ලැබූ ජනයාට අප එහි ආශිර්වාද කළ භූමියේ නැගෙනහිර පෙදෙස් සහ එහි බස්නාහිර පෙදෙස් අපි උරුමකර දුන්නෙමු. තවද ඔවුන් ඉවසිලිමත් වූ බැවින් ඔබගේ අධිපතියාණන්ගේ අලංකාර වචනය ඉස්රාඊල්ගේ දරුවන් වෙනුවෙන් ඉටු විය. තවද ෆිර්අවුන් සහ ඔහුගේ ජනතාව සෑදූ සියල්ල මෙන්ම ඔවුන් ඉදිකර ඇති සියල්ලද අපි විනාශ කළෙමු.

وَجٰوَزْنَا بِبَنِىْۤ اِسْرَآءِيْلَ الْبَحْرَ فَاَتَوْا عَلٰى قَوْمٍ يَّعْكُفُوْنَ عَلٰۤى اَصْنَامٍ لَّهُمْ ۚ قَالُوْا يٰمُوْسَى اجْعَلْ لَّنَاۤ اِلٰهًا كَمَا لَهُمْ اٰلِهَةٌ ؕ قَالَ اِنَّكُمْ قَوْمٌ تَجْهَلُوْنَ ۝١٣٩

139. තවද අපි ඉස්රාඊල්ගේ දරුවන්ව මුහුදෙන් එතෙරට ගෙන ආවෙමු. තවද සිය ප්‍රතිමාවන්ට කැප කළාවූ ජන පිරිසක් වෙතට ඔවුහු පැමිණියහ. 'එම්බල මූසා ඔවුනට දෙවිවරුන් සිටින්නාක් මෙන් අපටත් දෙවියෙකු සලසා දෙන්න'යි ඔවුහු කීහ. 'නියතවශයෙන්ම නුඹලා අඥාන ජන පිරිසක් යැ'යි ඔහු කීවේය.

اِنَّ هٰۤؤُلَاۤءِ مُتَبَّرٌ مَّا هُمْ فِيْهِ وَبٰطِلٌ مَّا كَانُوْا يَعْمَلُوْنَ ۝١٤٠

140. 'නියතවශයෙන්ම මොවුන්ව (ගත් කල), මොවුන් යෙදී සිටින සියල්ල විනාශයට පත්වන්නේය. තවද මොවුන් කරන සියල්ලක්ම නිශ්ඵල වන්නේය'.

قَالَ اَغَيْرَ اللّٰهِ اَبْغِيْكُمْ اِلٰهًا وَّهُوَ

141. 'ඔහු නුඹලාව සියළු ජන පිරිස්වලට ඉහලින් උසස් තත්වයකට

فَضَّلَكُمْ عَلَى الْعٰلَمِيْنَ ﴿١٤١﴾

පත්කර ඇති අතරතුර නුඹලා සඳහා අල්ලාහ් හැරෙන්නට වෙනත් දෙවියකු මා පතන්නෙම්දැ?යි' ඔහු කීවේය.

وَاِذْ اَنْجَيْنٰكُمْ مِّنْ اٰلِ فِرْعَوْنَ يَسُوْمُوْنَكُمْ سُوْٓءَ الْعَذَابِ ۚ يُقَتِّلُوْنَ اَبْنَآءَكُمْ وَيَسْتَحْيُوْنَ نِسَآءَكُمْ ؕ وَفِىْ ذٰلِكُمْ بَلَآءٌ مِّنْ رَّبِّكُمْ عَظِيْمٌ ﴿١٤٢﴾

142. තවද නුඹලාගේ පුත්‍රයින් ඝාතනය කරමින්, නුඹලාගේ ස්ත්‍රීන්ට ජීවත් වන්නට ඉඩ හරිමින්, නුඹලාට දරුණු වධහිංසා දුන් ෆිර්අවුන්ගේ ජනයාගෙන් අප නුඹලාව මුදවාගත් අවස්ථාව (සිහි කරනු). තවද එහි නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලාට මහත්වූ පරීක්ෂණයක් විය.

وَوٰعَدْنَا مُوْسٰى ثَلٰثِيْنَ لَيْلَةً وَّاَتْمَمْنٰهَا بِعَشْرٍ فَتَمَّ مِيْقَاتُ رَبِّهٖٓ اَرْبَعِيْنَ لَيْلَةً ۚ وَقَالَ مُوْسٰى لِاَخِيْهِ هٰرُوْنَ اخْلُفْنِىْ فِىْ قَوْمِىْ وَاَصْلِحْ وَلَا تَتَّبِعْ سَبِيْلَ الْمُفْسِدِيْنَ ﴿١٤٣﴾

143. තවද අපි මූසාට තිස්රැයක පොරොන්දුව දුනිමු. තවද ඒවාට දහයක් එක්කළෙමු. මෙලෙස ඔහුගේ අධිපතියාණන් මගින් නියම කළ කාලය සතලිස් රැයකින් පරිපූර්ණ විය. තවද මූසා තම සොහොයුරා හාරූන් වෙත 'මා නොවූ අවස්ථාවක මාගේ ජනතාව අතර මා වෙනුවෙන් නියෝජනය කරන්න. තවද (ඔවුන්ව) මැනැවින් පාලනය කරන්න. තවද කලබල ඇති කරන්නන්ගේ මාර්ගය අනුගමනය නොකරන්නැ'යි කීවේය.

وَلَمَّا جَآءَ مُوْسٰى لِمِيْقَاتِنَا وَكَلَّمَهٗ رَبُّهٗ ۙ قَالَ رَبِّ اَرِنِىْٓ اَنْظُرْ اِلَيْكَ ؕ قَالَ لَنْ تَرٰىنِىْ وَلٰكِنِ انْظُرْ اِلَى الْجَبَلِ فَاِنِ اسْتَقَرَّ مَكَانَهٗ فَسَوْفَ تَرٰىنِىْ ۚ فَلَمَّا تَجَلّٰى رَبُّهٗ لِلْجَبَلِ جَعَلَهٗ دَكًّا وَّخَرَّ مُوْسٰى صَعِقًا ۚ فَلَمَّآ اَفَاقَ قَالَ سُبْحٰنَكَ تُبْتُ اِلَيْكَ وَاَنَا اَوَّلُ

144. තවද අපගේ නියමිත කාලයේ මූසා පැමිණි විට ඔහුගේ අධිපතියාණන් ඔහුට කථා කළේය. 'මාගේ අධිපතියාණනි! මා ඔබව දැක ගැනීමට මා හට (ඔබව) පෙන් වන්නැ'යි ඔහු කීවේය. 'ඔබ මාව නොදකින්නෙහිය. එහෙත් කන්ද වෙත බලන්න තවද එය තම ස්ථානයෙහි රැඳී සිටින්නේ නම් එවිට ඔබ මාව දකින්නෙහිමයැ'යි ඔහු පිළිතුරු දුන්නේය. තවද ඔහුගේ අධිපතියාණන් කන්ද මත තමාව දෘශ්‍යමාන කළ විට ඔහු එය සුනුවිසුනු කළේය. තවද මූසා සිහිසුන්වී බිම වැටුනේය. තවද ඔහුට සිහිය ලැබූ කල්හි 'ඔබ පරිශුද්ධ වන්තය, මම ඔබ වෙත හැරෙන්නෙමි. තවද මම විශ්වාස කරන්නන්ගෙන්

الْمُؤْمِنِيْنَ ﴿١٤٤﴾

ප්‍රථමයා වන්නෙමි'යි ඔහු කීවේය.

قَالَ يٰمُوسٰىٓ اِنِّى اصْطَفَيْتُكَ عَلَى النَّاسِ بِرِسٰلٰتِىْ وَبِكَلَامِىْ ۖ فَخُذْ مَآ اٰتَيْتُكَ وَكُنْ مِّنَ الشّٰكِرِيْنَ ﴿١٤٥﴾

145. 'එම්බල මූසා! මාගේ පණිවුඩ සහ මාගේ වදනින් (ඔබගේ සමයේ) ජනතාවට ඉහලින් ඇත්තෙන්ම මම ඔබව තෝරා ගෙන ඇත්තෙමි. එබැවින් මා ඔබට දී ඇති දේ ග්‍රහණය කරගන්න. තවද කෘතඥවන්නන්ගෙන් වන්නැ'යි (දෙවියන්) කීවේය.

وَكَتَبْنَا لَهٗ فِى الْاَلْوَاحِ مِنْ كُلِّ شَىْءٍ مَّوْعِظَةً وَّتَفْصِيْلًا لِّكُلِّ شَىْءٍ ۚ فَخُذْهَا بِقُوَّةٍ وَّاْمُرْ قَوْمَكَ يَاْخُذُوْا بِاَحْسَنِهَا ؕ سَاُورِيْكُمْ دَارَ الْفٰسِقِيْنَ ﴿١٤٦﴾

146. තවද අපි ඔහු වෙනුවෙන් සියළු දේ සම්බන්ධයෙන් ඵලකයන්හි ලිව්වෙමු. (එය) සියළු දෙයහි දැනමුතුකමක්ද විස්තර කරන්නක් ද විය. 'එබැවින් ඒවා දැඩිව ග්‍රහණය කරගන්න. තවද එහි වඩාත් යහපත් දේ පිලිපැදීමට ඔබගේ මිනිසුන්ට අණ කරන්න. මා ඉතා ඉක්මනින් ඔබලාට සීමාව ඉක්මවන්නගේ වාසස්ථානය පෙන්වන්නෙමි'.

سَاَصْرِفُ عَنْ اٰيٰتِىَ الَّذِيْنَ يَتَكَبَّرُوْنَ فِى الْاَرْضِ بِغَيْرِ الْحَقِّ ؕ وَاِنْ يَّرَوْا كُلَّ اٰيَةٍ لَّا يُؤْمِنُوْا بِهَا ۚ وَاِنْ يَّرَوْا سَبِيْلَ الرُّشْدِ لَا يَتَّخِذُوْهُ سَبِيْلًا ۚ وَاِنْ يَّرَوْا سَبِيْلَ الْغَىِّ يَتَّخِذُوْهُ سَبِيْلًا ؕ ذٰلِكَ بِاَنَّهُمْ كَذَّبُوْا بِاٰيٰتِنَا وَكَانُوْا عَنْهَا غٰفِلِيْنَ ﴿١٤٧﴾

147. අයුක්ති සහගතව පොළොවෙහි අහංකාරව හැසිරෙන අයව මාගේ සලකුණු වලින් ඉතා ඉක්මනින් මම ඉවත් කරන්නෙමි. තවද ඔවුන් සියළුම සලකුණු දුටුවත් ඔවුන් එය කෙරෙහි විශ්වාස නොකරන්නෝය. තවද ඔවුන් සෘජු මාර්ගය දුටුවත් එය (ඔවුන්ගේ) මාර්ගය සේ නොගනී. නමුත් වැරදි මාර්ගය දුටුවිට එය (ඔවුන්ගේ) මාර්ගය සේ ගනී. මක් නිසාදයත් ඔවුන් අපගේ සලකුණු බොරු ලෙස සළකා ඒවා නොතැකූ නිසාය.

وَالَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِنَا وَلِقَآءِ الْاٰخِرَةِ حَبِطَتْ اَعْمَالُهُمْ ؕ هَلْ يُجْزَوْنَ اِلَّا مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿١٤٨﴾ ع

148. අපගේ සලකුණු සහ පරලොවෙහි හමුවීම ප්‍රතික්ෂේප කළ අයගේ ක්‍රියාවන් නිෂ්ඵල විය. ඔවුන් කළ දෙයට මිස (අන් දෙයට) ප්‍රතිඵල ඔවුනට ලැබීමට (බලාපොරොත්තු විය) හැකිද?

وَاتَّخَذَ قَوْمُ مُوسَىٰ مِن بَعْدِهِ مِنْ حُلِيِّهِمْ عِجْلًا جَسَدًا لَّهُ خُوَارٌ ۚ أَلَمْ يَرَوْا أَنَّهُ لَا يُكَلِّمُهُمْ وَلَا يَهْدِيهِمْ سَبِيلًا ۘ اتَّخَذُوهُ وَكَانُوا ظَالِمِينَ ﴿١٤٩﴾

149. තවද මූසා නොසිටි විටදී ඔහුගේ ජනතාව තමන්ගේ ආභරණවලින් වසු පැටවෙකු සෑදූහ. එය තප්පුලන හඬක් නගන (අප්‍රාණික) ශරීරයක් විය. එය ඔවුනට කථා නොකරන්නක් මෙන්ම ඔවුන්ට මග නොපෙන්වන්නක් බව ඔවුහු නොදැක්කේද? ඔවුන් එය (ඇදහිම සඳහා) ගත්තෝය. තවද ඔවුන් සීමාව ඉක්මවන්නන් වූවෙහුය.

وَلَمَّا سُقِطَ فِي أَيْدِيهِمْ وَرَأَوْا أَنَّهُمْ قَدْ ضَلُّوا قَالُوا لَئِن لَّمْ يَرْحَمْنَا رَبُّنَا وَيَغْفِرْ لَنَا لَنَكُونَنَّ مِنَ الْخَاسِرِينَ ﴿١٥٠﴾

150. තවද ඔවුන් මහත් කණස්සල්ලෙන් පීඩාවට පත්වී තමන් නියතවශයෙන්ම නොමග ගොස් ඇති බව දුටු කල්හි 'අප අධිපතියාණනි, අපට දයාව නොදක්වා ක්ෂමාව නොදුනහොත් සත්‍යවශයෙන්ම අපි පරාජිතයින් වන්නෙමු'යි කීහ.

وَلَمَّا رَجَعَ مُوسَىٰ إِلَىٰ قَوْمِهِ غَضْبَانَ أَسِفًا قَالَ بِئْسَمَا خَلَفْتُمُونِي مِن بَعْدِي ۖ أَعَجِلْتُمْ أَمْرَ رَبِّكُمْ ۖ وَأَلْقَى الْأَلْوَاحَ وَأَخَذَ بِرَأْسِ أَخِيهِ يَجُرُّهُ إِلَيْهِ ۚ قَالَ ابْنَ أُمَّ إِنَّ الْقَوْمَ اسْتَضْعَفُونِي وَكَادُوا يَقْتُلُونَنِي فَلَا تُشْمِتْ بِيَ الْأَعْدَاءَ وَلَا تَجْعَلْنِي مَعَ الْقَوْمِ الظَّالِمِينَ ﴿١٥١﴾

151. තවද කෝපයට සහ කණස්සල්ලට පත්ව මූසා තම ජනතාව වෙත ආපසු පැමිණි විට ඔහු, 'මගේ ස්ථානයේ මා නැතිවිට නුඹලා කර ඇත්තේ ඉතා නපුරකි. නුඹලාගේ අධිපතියාණන්ගේ විධානය ලැබෙනතෙක් නොසිට නුඹලා තමන් වෙනුවෙන් මාගීයක් සාදාගැනීමට ඉක්මන් වූවේද?' අනතුරුව ඔහු එලකය බිම දමා සිය සොහොයුරාගේ හිසෙන් අල්ලා ඔහුව තමන් වෙතට ඇද ගත්තේය. ඔහු (හාරූන්) 'මාගේ මවගේ පුත්‍රයාණෙනි, නියත වශයෙන්ම මෙම ජනතාව මා දුර්වලයෙකු යැයි සිතා මා ඝාතනය කිරීමට සූදානම් වූවෙහුය. එබැවින් සතුරන්ට මා හේතුකොටගෙන ප්‍රීතිවීමට ඉඩ නොහරින්න. එමෙන්ම මාව අදම්ටුවන්ගේ ගණයට නොහෙලන්නැ'යි කීවේය.

قَالَ رَبِّ اغْفِرْ لِي وَلِأَخِي وَأَدْخِلْنَا فِي رَحْمَتِكَ ۖ وَأَنتَ أَرْحَمُ الرَّاحِمِينَ ﴿١٥٢﴾

152. 'මාගේ අධිපතියාණනි, මටත් මගේ සොහොයුරාටත් ක්ෂමාකර ඔබගේ දයාව වෙතට ඇතුල් කරනු මැනව. තවද ඔබ දයාව දක්වන්නන්ගෙන් වඩාත්ම දයාව දක්වන්නා යැ'යි ඔහු (මූසා) කීය.

153. වසුපැටවකු (ඇදහීමට) ගත් අයට ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් මහත් කෝපයද මෙලොව ජිවිතයෙහි දී නින්දාවද අත්වන්නේමය. තවද මෙලෙස බොරු ගොතන්නන්ට අපි ප්‍රතිවිපාක දෙන්නෙමු.

إِنَّ الَّذِينَ اتَّخَذُوا الْعِجْلَ سَيَنَالُهُمْ غَضَبٌ مِّن رَّبِّهِمْ وَذِلَّةٌ فِي الْحَيَاةِ الدُّنْيَا ۚ وَكَذَٰلِكَ نَجْزِي الْمُفْتَرِينَ ﴿١٥٣﴾

154. නමුත් පාපක්‍රියාවන් කර එයට පසුව පශ්චාත්තාප වී විශ්වාස කළ අයට, නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් මින් පසුවත් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَالَّذِينَ عَمِلُوا السَّيِّئَاتِ ثُمَّ تَابُوا مِن بَعْدِهَا وَآمَنُوا إِنَّ رَبَّكَ مِن بَعْدِهَا لَغَفُورٌ رَّحِيمٌ ﴿١٥٤﴾

155. තවද මූසාගේ කෝපය පහව ගිය විට ඔහු එලකයන් ගත්තේය. එම ලියවිල්ලෙහි, ඔවුන්ගේ අධිපතියාණන් කෙරෙහි බිය වන්නන්හට මග පෙන්වීමද දයාවද විය.

وَلَمَّا سَكَتَ عَن مُّوسَى الْغَضَبُ أَخَذَ الْأَلْوَاحَ ۖ وَفِي نُسْخَتِهَا هُدًى وَرَحْمَةٌ لِّلَّذِينَ هُمْ لِرَبِّهِمْ يَرْهَبُونَ ﴿١٥٥﴾

156. තවද මූසා අපගේ එම නියමිත මොහොත වෙනුවෙන් තම ජනයාගෙන් පිරිමින් හැත්තෑ දෙනෙකු තෝරාගත්තේය. එහෙත් භූමිකම්පාව ඔවුන්ව වෙළාගත් විට 'මාගේ අධිපතියාණනි, ඔබ කැමති වූයේ නම් (මීට) පෙර ඔබ ඔවුන්ව විනාශ කරන්නට තිබුණි, මාවත් (සමග). අප අතර අඥානයන් කළ දේ හේතුවෙන් ඔබ අපව විනාශ කරන්නේද?. මෙය ඔබගෙන් පිරික්සුමක් මිස නැත. මෙමගින් ඔබ කැමති අයව දුර්මාර්ගයට පත් කරන්නේය. තවද ඔබ කැමති අයට යහමග ලබා දෙන්නේය. ඔබ අපගේ ආරක්ෂකයාය. එබැවින් අපව ක්ෂමා කරනු මැනව. තවද අපට දයාව දක්වනු මැනව. ඔබ ක්ෂමා කරන්නන්ගෙන් ශ්‍රේෂ්ඨයැ'යි ඔහු කීවේය.

وَاخْتَارَ مُوسَىٰ قَوْمَهُ سَبْعِينَ رَجُلًا لِّمِيقَاتِنَا ۖ فَلَمَّا أَخَذَتْهُمُ الرَّجْفَةُ قَالَ رَبِّ لَوْ شِئْتَ أَهْلَكْتَهُم مِّن قَبْلُ وَإِيَّايَ ۖ أَتُهْلِكُنَا بِمَا فَعَلَ السُّفَهَاءُ مِنَّا ۖ إِنْ هِيَ إِلَّا فِتْنَتُكَ تُضِلُّ بِهَا مَن تَشَاءُ وَتَهْدِي مَن تَشَاءُ ۖ أَنتَ وَلِيُّنَا فَاغْفِرْ لَنَا وَارْحَمْنَا ۖ وَأَنتَ خَيْرُ الْغَافِرِينَ ﴿١٥٦﴾

157. 'තවද මෙලොවෙහිදීත් පරලොවෙහිදීත් අපට යහපත නියම

وَاكْتُبْ لَنَا فِي هَٰذِهِ الدُّنْيَا حَسَنَةً وَفِي

الْاٰخِرَةِ اِنَّا هُدْنَاۤ اِلَيْكَ ؕ قَالَ عَذَابِىْۤ اُصِيْبُ بِهٖ مَنْ اَشَآءُ ۚ وَرَحْمَتِىْ وَسِعَتْ كُلَّ شَىْءٍ ؕ فَسَاَكْتُبُهَا لِلَّذِيْنَ يَتَّقُوْنَ وَيُؤْتُوْنَ الزَّكٰوةَ وَالَّذِيْنَ هُمْ بِاٰيٰتِنَا يُؤْمِنُوْنَ ۚ (١٥٧)

කරනු මැනව. (පශ්චාත්තාපයෙන් යුතුව) අපි ඔබ වෙත හැරුනෙමු' (යැයිද ඔහු කීවේය). 'මා කැමති අයට මාගේ දඬුවම මම පමුණුවන්නෙමි. එහෙත් මාගේ දයාව සෑම දේ කෙරෙහිම ව්‍යාප්තය. එබැවින් ධාර්මිෂ්ඨ ක්‍රියා කරන අයටත් zසකාත් (දුගී බද්ද) ගෙවන අයටත්, අපගේ සලකුණු කෙරෙහි විශ්වාස කරන්නන්ටත් මම එය නියම කරන්නෙමි'යි (දෙවියන්) පිළිතුරු දුන්නේය.

اَلَّذِيْنَ يَتَّبِعُوْنَ الرَّسُوْلَ النَّبِىَّ الْاُمِّىَّ الَّذِىْ يَجِدُوْنَهٗ مَكْتُوْبًا عِنْدَهُمْ فِى التَّوْرٰىةِ وَالْاِنْجِيْلِ يَاْمُرُهُمْ بِالْمَعْرُوْفِ وَيَنْهٰٮهُمْ عَنِ الْمُنْكَرِ وَيُحِلُّ لَهُمُ الطَّيِّبٰتِ وَيُحَرِّمُ عَلَيْهِمُ الْخَبٰۤئِثَ وَيَضَعُ عَنْهُمْ اِصْرَهُمْ وَالْاَغْلٰلَ الَّتِىْ كَانَتْ عَلَيْهِمْ ؕ فَالَّذِيْنَ اٰمَنُوْا بِهٖ وَعَزَّرُوْهُ وَنَصَرُوْهُ وَاتَّبَعُوا النُّوْرَ الَّذِىْۤ اُنْزِلَ مَعَهٗۤ ۙ اُولٰۤئِكَ هُمُ الْمُفْلِحُوْنَ (١٥٨) ع

158. කවුරුන් හෝ ඔවුන් වෙත ඇති තව්රාත්හිද ඉන්ජීල්හිද සඳහන් කරන ලද අක්ෂර දැනුම නොදත් දූතයාණන් වන මෙම වක්තෘවරයාව අනුගමනය කරන්නේද, ඒ අයට යහපත් දේ ඔහු අණ කරන අතර අයහපත් දේ ඔවුනට තහනම් කරන්නේය. තවද ඔවුනට යහපත් දේ නිත්‍යානුකූල කරන අතර අයහපත් දේ ඔවුනට අනිත්‍යානුකූල කරන්නේය. තවද ඔවුන්ගේ (පටවන ලද) බර සහ ඔවුන් මත වූ විලංගු ඔවුන්ගෙන් ඉවත් කරන්නේය. එබැවින් කවුරුන් හෝ ඔහු කෙරෙහි විශ්වාස කරමින්ද ඔහුට ගෞරව කරමින් සහ සහයෝගය දෙමින්ද ඔහුට උදව් කරමින්ද ඔහු සමග පහළ කරන ලද ආලෝකය අනුගමනය කරන්නේද ඔවුන්ම ජයග්‍රාහිකයින් වන්නෝය.

قُلْ يٰۤاَيُّهَا النَّاسُ اِنِّىْ رَسُوْلُ اللّٰهِ اِلَيْكُمْ جَمِيْعَا ۨ الَّذِىْ لَهٗ مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ ۚ لَاۤ اِلٰهَ اِلَّا هُوَ يُحْىٖ وَيُمِيْتُ ۖ

159. පවසන්න, 'එම්බල මිනිසුනි, සත්‍යවශයෙන්ම මම ඔබ සියල්ලන්ටම අල්ලාහ් වෙතින් දූතයෙක් වන්නෙමි. අහස් සහ පොළොවේ රාජධානිය ඔහු සතුමය. ඔහු හැර නැමදීමට සුදුස්සෙක් නොමැත. ඔහු ජීවය දෙන්නේය, තවද ඔහු මරණයට පත් කරන්නේය.

فَـَٔامِنُوا بِاللَّهِ وَرَسُولِهِ النَّبِيِّ الْأُمِّيِّ الَّذِي يُؤْمِنُ بِاللَّهِ وَكَلِمَٰتِهِ وَاتَّبِعُوهُ لَعَلَّكُمْ تَهْتَدُونَ ﴿١٥٩﴾

එබැවින් අල්ලාහ් කෙරෙහි විශ්වාස කරනු. තවද අල්ලාහ් සහ ඔහුගේ වදන් කෙරෙහි විශ්වාස කරන අක්ෂර දැනුම නොදත් වක්තෘවරයා වන ඔහුගේ දූතයාණන් කෙරෙහි(ද විශ්වාස කරනු). තවද නුඹලා යහමග ලබනු පිණිස ඔහු අනුගමනය කරනු'.

وَمِن قَوْمِ مُوسَىٰٓ أُمَّةٌ يَهْدُونَ بِالْحَقِّ وَبِهِۦ يَعْدِلُونَ ﴿١٦٠﴾

160. තවද සත්‍යයෙන් යුතුව මග පෙන්වන සහ ඔවුන් වෙනුවෙන් යුක්තිය ඉටු කරන පිරිසක් මූසාගේ ජනයා අතර වෙති.

وَقَطَّعْنَٰهُمُ اثْنَتَيْ عَشْرَةَ أَسْبَاطًا أُمَمًا ۚ وَأَوْحَيْنَآ إِلَىٰ مُوسَىٰٓ إِذِ اسْتَسْقَىٰهُ قَوْمُهُۥٓ أَنِ اضْرِب بِّعَصَاكَ الْحَجَرَ ۖ فَانۢبَجَسَتْ مِنْهُ اثْنَتَا عَشْرَةَ عَيْنًا ۖ قَدْ عَلِمَ كُلُّ أُنَاسٍ مَّشْرَبَهُمْ ۚ وَظَلَّلْنَا عَلَيْهِمُ الْغَمَٰمَ وَأَنزَلْنَا عَلَيْهِمُ الْمَنَّ وَالسَّلْوَىٰ ۖ كُلُوا مِن طَيِّبَٰتِ مَا رَزَقْنَٰكُمْ ۚ وَمَا ظَلَمُونَا وَلَٰكِن كَانُوٓا أَنفُسَهُمْ يَظْلِمُونَ ﴿١٦١﴾

161. තවද අපි, ඔවුන්ව (වෙන් වෙන්වූ) ජනයා ලෙස ගෝත්‍ර දොළහකට බෙදුවෙමු. තවද අපි මූසාට, ඔහුගේ ජනතාව ඔහුගෙන් ජලය ඉල්ලූ විට 'ඔබගේ සැරයටියෙන් එම ගල මතට ගසනු'යි (පවසමින්) අනාවරණය කළෙමු. තවද එයින් දිය උල්පත් දොළසක් පැන නැගුණේය. සෑම ගෝත්‍රයම ඔවුන්ගේ පානය කරන ස්ථානය දැනගත්හ. තවද අපි වලාකුළු ඔවුන්ට ඉහළින් සෙවණක් ලෙස සැලැස්සුවෙමු. තවද අපි ඔවුනට "මන්න" ද "සල්වා" ද පහළ කළෙමු. 'අපි නුඹලාට ලබා දුන් පවිත්‍ර දෑයින් අනුභව කරනු'(යි කීවෙමු). තවද ඔවුන් අපට වැරදි නොකළෝය. එහෙත් ඔවුන් තමන්ටම වැරදි කර ගත්තෝය.

وَإِذْ قِيلَ لَهُمُ اسْكُنُوا هَٰذِهِ الْقَرْيَةَ وَكُلُوا مِنْهَا حَيْثُ شِئْتُمْ وَقُولُوا حِطَّةٌ وَادْخُلُوا الْبَابَ سُجَّدًا نَّغْفِرْ لَكُمْ خَطِيٓـَٰٔتِكُمْ ۚ سَنَزِيدُ الْمُحْسِنِينَ ﴿١٦٢﴾

162. තවද ඔවුන් වෙතට, "මෙම නගරයේ වාසය කරනු. තවද එයින් නුඹලා කැමති තැනකින් අනුභව කරනු. තවද '(දෙවියනි)! (පටවන ලද අපගේ) බර සැහැල්ලු කරනු මැනවැ'යි පවසනු. තවද නිහතමානීව දොරටුවෙන් ඇතුල් වනු, අපි නුඹලාගේ පව් ක්ෂමා කරන්නෙමු. (තවද) නියතවශයෙන්ම යහකම් කරන්නන්හට අපි බහුලව (ඵල) ලබාදෙන්නෙමු"යි එය කියනු ලැබූ අවස්ථාව (සිහි කරනු).

163. එහෙත් ඔවුන් අතුරින් සීමාව ඉක්මවූවන්, ඔවුනට පවසන ලද දේ (එයට) වෙනස් වූ වදනකට වෙනස් කළෝය. එහෙයින් ඔවුන්ගේ වැරදි ක්‍රියාවන් හේතුවෙන් ඔවුන් වෙතට අපි අහසින් දඬුවමක් පහළ කළෙමු.

فَبَدَّلَ الَّذِينَ ظَلَمُوا مِنْهُمْ قَوْلًا غَيْرَ الَّذِي قِيلَ لَهُمْ فَأَرْسَلْنَا عَلَيْهِمْ رِجْزًا مِّنَ السَّمَاءِ بِمَا كَانُوا يَظْلِمُونَ ﴿١٦٣﴾

164. තවද මුහුද අසල පිහිටි එම නගරය ගැන ඔවුන්ගෙන් අසන්න. ඔවුන් සබත් කඩ කළවිට, ඔවුන්ගේ මත්ස්‍යයන් සබත් දිනයේදී ඔවුන් වෙතට පැමිණි විට, (දිය) මතුපිටින් දිස්විය. එහෙත් යම් දිනක ඔවුන් සබත් නොරැක්කේද, උන් ඔවුන් වෙත නොපැමිණියෝය. ඔවුන් කැරලිකාර වූ බැවින් අපි ඔවුන්ව මෙලෙස පිරික්සුවෙමු.

وَسْئَلْهُمْ عَنِ الْقَرْيَةِ الَّتِي كَانَتْ حَاضِرَةَ الْبَحْرِ إِذْ يَعْدُونَ فِي السَّبْتِ إِذْ تَأْتِيهِمْ حِيتَانُهُمْ يَوْمَ سَبْتِهِمْ شُرَّعًا وَيَوْمَ لَا يَسْبِتُونَ لَا تَأْتِيهِمْ كَذَٰلِكَ نَبْلُوهُم بِمَا كَانُوا يَفْسُقُونَ ﴿١٦٤﴾

165. තවද 'අල්ලාහ් විනාශ කරන්නට හෝ දැඩි දඬුවමකින් දඬුවම් කරන්නට හෝ සිටින ජනතාවකට නුඹලා දේශනා කරන්නේ කුමක් නිසාදැ?' යි ඔවුන් අතරවූ පිරිසක් පැවසූවිට, 'නුඹලාගේ අධිපතියාණන් ඉදිරියෙහි වරදින් නිදොස් වන්නටත් (අල්ලාහ් කෙරෙහි) ඔවුන් බිය බැතිමත් වන්නටත් ඉඩ ඇතැ'යි ඔවුහු කීහ.

وَإِذْ قَالَتْ أُمَّةٌ مِّنْهُمْ لِمَ تَعِظُونَ قَوْمًا اللَّهُ مُهْلِكُهُمْ أَوْ مُعَذِّبُهُمْ عَذَابًا شَدِيدًا قَالُوا مَعْذِرَةً إِلَىٰ رَبِّكُمْ وَلَعَلَّهُمْ يَتَّقُونَ ﴿١٦٥﴾

166. තවද ඔවුනට දැනමුතුකම් දෙන ලද සියල්ල ඔවුන් අමතක කළ විට නපුරෙන් වැළැක්වූ අයව අපි බේරා ගත්තෙමු. තවද අපි සීමාව ඉක්මවූවන්ව දැඩි දඬුවමකට හසු කළෙමු. මන්දයත් ඔවුන් පව් කරමින් සිටියහ.

فَلَمَّا نَسُوا مَا ذُكِّرُوا بِهِ أَنجَيْنَا الَّذِينَ يَنْهَوْنَ عَنِ السُّوءِ وَأَخَذْنَا الَّذِينَ ظَلَمُوا بِعَذَابٍ بَئِيسٍ بِمَا كَانُوا يَفْسُقُونَ ﴿١٦٦﴾

167. තවද ඔවුන්ට තහනම් කරනු ලැබූ දෙයට එරෙහිව ඔවුන් ගර්වයෙන් අවනත නොවූ විට 'නුඹලා නිච රිළව් වනු!'යි අපි ඔවුනට කීවෙමු.

فَلَمَّا عَتَوْا عَن مَّا نُهُوا عَنْهُ قُلْنَا لَهُمْ كُونُوا قِرَدَةً خَاسِئِينَ ﴿١٦٧﴾

وَإِذْ تَأَذَّنَ رَبُّكَ لَيَبْعَثَنَّ عَلَيْهِمْ إِلَىٰ يَوْمِ الْقِيَامَةِ مَن يَسُومُهُمْ سُوءَ الْعَذَابِ ۗ إِنَّ رَبَّكَ لَسَرِيعُ الْعِقَابِ ۖ وَإِنَّهُ لَغَفُورٌ رَّحِيمٌ ﴿١٦٨﴾

168. තවද පුනරුත්ථාන දිනය තෙක් ඔවුන්ට දැඩි වධහිංසා පමුණුවන්නන්ව ඔහු සත්තකින්ම ඔවුන්ට එරෙහිව එවන බව ඔබගේ අධිපතියාණන් දැන්වූ (එම) අවස්ථාව (සිහිපත් කරනු). ඇත්තෙන්ම ඔබගේ අධිපතියාණන් විපාක දීමෙහි ඉතා සීඝ්‍රය. තවද ඇත්තෙන්ම ඔහු ඉතා ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَقَطَّعْنَاهُمْ فِي الْأَرْضِ أُمَمًا ۖ مِّنْهُمُ الصَّالِحُونَ وَمِنْهُمْ دُونَ ذَٰلِكَ ۖ وَبَلَوْنَاهُم بِالْحَسَنَاتِ وَالسَّيِّئَاتِ لَعَلَّهُمْ يَرْجِعُونَ ﴿١٦٩﴾

169. තවද අපි ඔවුන්ව පොළොවෙහි (වෙන්වෙන්) ජන සමූහයන් වශයෙන් බෙදුවෙමු. ඔවුන් අතර ඇතැමෙක් ධාර්මිෂ්ඨ අය වන අතර තවද ඔවුන් අතර ඇතැමෙක් එසේ නොවෙති. තවද ඔවුන් (යහමඟ වෙතට) හැරෙනු පිණිස අපි ඔවුන්ව හොඳ දෙයින්ද නරක දෙයින්ද පිරික්සුවෙමු.

فَخَلَفَ مِن بَعْدِهِمْ خَلْفٌ وَرِثُوا الْكِتَابَ يَأْخُذُونَ عَرَضَ هَٰذَا الْأَدْنَىٰ وَيَقُولُونَ سَيُغْفَرُ لَنَا وَإِن يَأْتِهِمْ عَرَضٌ مِّثْلُهُ يَأْخُذُوهُ ۚ أَلَمْ يُؤْخَذْ عَلَيْهِم مِّيثَاقُ الْكِتَابِ أَن لَّا يَقُولُوا عَلَى اللَّهِ إِلَّا الْحَقَّ وَدَرَسُوا مَا فِيهِ ۗ وَالدَّارُ الْآخِرَةُ خَيْرٌ لِّلَّذِينَ يَتَّقُونَ ۗ أَفَلَا تَعْقِلُونَ ﴿١٧٠﴾

170. එහෙයින් පුස්තකය උරුමකරගත් අයට පසුව (දුෂ්ඨ) පරම්පරාවක් පැමිණ ඇත. ඔවුන් මෙම පහත් (ලොවේ) අල්ප දේවල් අත්කරගෙන 'අපට ක්ෂමාව දෙනු ලබන්නේය'යි කියති. නමුත් ඔවුනට එවැනිම දේවල් (නැවතත්) පැමිණි විට ඒවාද ඔවුන් අත්කර ගන්නෝය. අල්ලාහ් පිළිබඳ සත්‍ය හැර (අන් කිසිවක්) ඔවුන් නොපවසන බවට පුස්තකයේ ප්‍රතිඥාව ඔවුන්ගෙන් ලබා නොගන්නා ලද්දේද? තවද ඔවුන් එහි ඇති දේ අධ්‍යයනය කර ඇත්තෝය. එහෙත් දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන්ට පරලොවේ වාසස්ථානය වඩා යහපත්වේ. එබැවින් නුඹලා වටහා නොගන්නේ මන්ද?

وَالَّذِينَ يُمَسِّكُونَ بِالْكِتَابِ وَأَقَامُوا الصَّلَاةَ إِنَّا لَا نُضِيعُ أَجْرَ الْمُصْلِحِينَ ﴿١٧١﴾

171. පුස්තකය (එහි ඇතිදේ) දැඩිව අල්ලාගෙන නමස්කාරයේ නිරතවන්නන් ගත් කළ නියතවශයෙන්ම (එවැනි) ධාර්මිෂ්ඨක (ජන)යින්ගේ තිළිණය අපි විනාශ නොකරන්නෙමු.

وَاِذۡ نَتَقۡنَا الۡجَبَلَ فَوۡقَهُمۡ كَاَنَّهٗ ظُلَّةٌ وَّظَنُّوۡۤا اَنَّهٗ وَاقِعٌۢ بِهِمۡۚ خُذُوۡا مَاۤ اٰتَيۡنٰكُمۡ بِقُوَّةٍ وَّاذۡكُرُوۡا مَا فِيۡهِ لَعَلَّكُمۡ تَتَّقُوۡنَ ﴿١٧٢﴾

ع ٢١ ١١

172. තවද අපි ඔවුන්ට ඉහළින් කන්ද වියනක් සේ ඔවුන් මත නැඹුරු වීමට සැලැස්සුවෙමු. තවද ඔවුන්, එය ඔවුන් මතට වැටෙන්නේ යැයි සිතූහ. 'අප නුඹලාට දුන් දේ දැඩිව අල්ලා ගනු. තවද නුඹලා ආරක්ෂාවනු පිණිස එහි ඇති දේ සිහිපත් කරනු'(යි අපි පැවසුවෙමු.)

وَاِذۡ اَخَذَ رَبُّكَ مِنۡۢ بَنِىۡۤ اٰدَمَ مِنۡ ظُهُوۡرِهِمۡ ذُرِّيَّتَهُمۡ وَاَشۡهَدَهُمۡ عَلٰٓى اَنۡفُسِهِمۡۚ اَلَسۡتُ بِرَبِّكُمۡؕ قَالُوۡا بَلٰىۛۚ شَهِدۡنَاۛۚ اَنۡ تَقُوۡلُوۡا يَوۡمَ الۡقِيٰمَةِ اِنَّا كُنَّا عَنۡ هٰذَا غٰفِلِيۡنَ ﴿١٧٣﴾

معانقة ٧ عند المتأخرين

173. තවද ඔබගේ අධිපතියාණන් ආදම්ගේ දරුවන්ගේ ඇකයෙන් ඔවුන්ගේ පරපුර බිහිකරවා ඔවුන්ව තමන්ගේ ජනතාවට එරෙහිව සාක්ෂිකරුවන් කර 'මම නුඹලාගේ අධිපතියාණන් නොවෙම්දැ?'යි (පවසන) විට 'එසේය, අපි සාක්ෂි දරමු' යි ඔවුහු කියති. 'නියතවශයෙන්ම අපි මෙය නොදැන සිටියෙමු' යි පුනරුත්ථාන දිනයේ නුඹලා නොකියනු පිණිස (ඔහු මෙය කරන්නේ)ය.

اَوۡ تَقُوۡلُوۡۤا اِنَّمَاۤ اَشۡرَكَ اٰبَآؤُنَا مِنۡ قَبۡلُ وَكُنَّا ذُرِّيَّةً مِّنۡۢ بَعۡدِهِمۡۚ اَفَتُهۡلِكُنَا بِمَا فَعَلَ الۡمُبۡطِلُوۡنَ ﴿١٧٤﴾

174. නැතහොත් 'අතීතයේදී (දෙවියන්ට) සමානයන් ඇති කළේ අපගේ පියවරුන් පමණි. තවද අප (හුදෙක්) ඔවුන්ගෙන් පසු පැමිණි පරපුරකි. එබැවින් ඔබ අපව විනාශයට පත්කරන්නේ මුසාවාදීන් කළ දේ හේතුවෙන් දැ?'යි නුඹලා නොකියනු පිණිසය.

وَكَذٰلِكَ نُفَصِّلُ الۡاٰيٰتِ وَلَعَلَّهُمۡ يَرۡجِعُوۡنَ ﴿١٧٥﴾

175. තවද ඔවුන් (අප වෙත) ආපසු පැමිණෙනු පිණිසද (ඔවුන් දැනමුතුකම් ලබනු පිණිසද) අපි මේ ආකාරයෙන් අපගේ සලකුණු පැහැදිලි කරන්නෙමු.

وَاتۡلُ عَلَيۡهِمۡ نَبَاَ الَّذِىۡۤ اٰتَيۡنٰهُ اٰيٰتِنَا فَانۡسَلَخَ مِنۡهَا فَاَتۡبَعَهُ الشَّيۡطٰنُ فَكَانَ مِنَ الۡغٰوِيۡنَ ﴿١٧٦﴾

176. තවද අප අපගේ සලකුණු දුන් තැනැත්තෙකුගේ වෘත්තාන්තය ඔවුන් වෙත කියාපාන්න. නමුත් ඔහු ඒවායෙන් බැහැරව ගියේය. එබැවින් ෂෙයිතාන් ඔහුව ලුහුබැන්දේය. තවද ඔහු◆ නොමග යනවුන්ගෙන් (කෙනෙක්) විය.

◆ බයිබලයෙන් කුර්ආන් විචාරකයිනුත් මෙහි සඳහන් වන තැනැත්තා බාඋර්ගේ පුත්‍රයා බල්අම් යැයි සඳහන් කරති. ඔහුගේ ක්‍රියාවන් මෙම වාක්‍යයට ගැලපේ. නමුත් සත්‍යවශයෙන්ම මෙය නිදසුනක් වේ. එම නිසා මේ අයුරින් කවුරුන් හෝ තමන්ව පත්කර ගන්නේද ඔවුන්ට මෙම නිදසුන ගැලපේ. එනම් ඔහුම බල්අම් බවට පත්වන්නේය.

177. තවද අපි කැමැති වූයේනම් එම(සලකුණු ම)ගින් අප ඔහුව උසස් තත්වයකට පත්කිරීමට තිබුණි. එහෙත් ඔහු පොළොව වෙත නැඹුරු වී තමන්ගේ දුෂ්ඨ අභිලාෂය අනුගමනය කළේය. එබැවින් ඔහුගේ උදාහරණය සුනඛයකුගේ උදාහරණයක් බඳුය. ඔබ ඌට ගලකින් ගහන බව ඇඟවූවත් ඌ හති දමමින් දිව එල්ලාගෙන සිටියි. නොඑසේනම් ඔබ ඌව නිදැල්ලේ හැරිය විටද ඌ හති දමමින් දිව එල්ලාගෙන සිටියි. අපගේ සලකුණු කෙරෙහි අවිශ්වාස කරන ජනතාවගේ තත්ත්වය මෙය වේ. එමනිසා ඔවුන් (පාඩමක් ඉගෙන ගැනීමට) සිතනු පිණිස ඔබ මෙම (ඉතිහාසයේ වූ) සිද්ධීන් විදහා දක්වන්න.

وَلَوْ شِئْنَا لَرَفَعْنَٰهُ بِهَا وَلَٰكِنَّهُۥٓ أَخْلَدَ إِلَى ٱلْأَرْضِ وَٱتَّبَعَ هَوَىٰهُ ۚ فَمَثَلُهُۥ كَمَثَلِ ٱلْكَلْبِ ۚ إِن تَحْمِلْ عَلَيْهِ يَلْهَثْ أَوْ تَتْرُكْهُ يَلْهَث ۚ ذَّٰلِكَ مَثَلُ ٱلْقَوْمِ ٱلَّذِينَ كَذَّبُوا۟ بِـَٔايَٰتِنَا ۚ فَٱقْصُصِ ٱلْقَصَصَ لَعَلَّهُمْ يَتَفَكَّرُونَ ﴿١٧٧﴾

178. අපගේ සලකුණු මුසාවන් සේ සැලකූ අයගේ තත්ත්වය ඉතා නපුරුය. තවද ඔවුන් තමන්ටම වැරදි කරගත්තෝය.

سَآءَ مَثَلًا ٱلْقَوْمُ ٱلَّذِينَ كَذَّبُوا۟ بِـَٔايَٰتِنَا وَأَنفُسَهُمْ كَانُوا۟ يَظْلِمُونَ ﴿١٧٨﴾

179. කවරෙකුට අල්ලාහ් මඟ පෙන්වන්නේද ඔහුම යහමග ලද්දාය. තවද කවුරුන්ව අල්ලාහ් නොමගෙහි හැර දමන්නේද ඔවුන්ම පරාජිතයන් වන්නෝය.

مَن يَهْدِ ٱللَّهُ فَهُوَ ٱلْمُهْتَدِى ۖ وَمَن يُضْلِلْ فَأُو۟لَٰٓئِكَ هُمُ ٱلْخَٰسِرُونَ ﴿١٧٩﴾

180. සැබැවින්ම අපි මවා ඇති ජින්වරුන්ගෙන් සහ මිනිසුන්ගෙන් බොහෝ දෙනාගේ අවසානය නිරය වේ. ඔවුන්ට හදවත් ඇතත් එමගින් ඔවුන් වටහා නොගනිති. ඔවුන්ට ඇස් ඇතත් එමගින් ඔවුන් නොදකිති. ඔවුන්ට කන් ඇතත් එමගින් ඔවුන් නොඅසති. ඔවුන් ගවසතුන් මෙන්ය. නොඑසේය, ඔවුන් (ඊටත්) වඩා නොමග ගියවුන්ය. නියතවශයෙන් ඔවුන් නොතකන්නන්ම වන්නෝය.

وَلَقَدْ ذَرَأْنَا لِجَهَنَّمَ كَثِيرًا مِّنَ ٱلْجِنِّ وَٱلْإِنسِ ۖ لَهُمْ قُلُوبٌ لَّا يَفْقَهُونَ بِهَا وَلَهُمْ أَعْيُنٌ لَّا يُبْصِرُونَ بِهَا وَلَهُمْ ءَاذَانٌ لَّا يَسْمَعُونَ بِهَآ ۚ أُو۟لَٰٓئِكَ كَٱلْأَنْعَٰمِ بَلْ هُمْ أَضَلُّ ۚ أُو۟لَٰٓئِكَ هُمُ ٱلْغَٰفِلُونَ ﴿١٨٠﴾

181. පරිපූර්ණ ගුණාංග (සියල්ල) අල්ලාහ්ට (පමණක්) අයත්වේ.

وَلِلَّهِ ٱلْأَسْمَآءُ ٱلْحُسْنَىٰ فَٱدْعُوهُ بِهَا ۖ

وَذَرُوا الَّذِيْنَ يُلْحِدُوْنَ فِيْٓ اَسْمَآئِهٖ ؕ سَيُجْزَوْنَ مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿١٨٠﴾

එබැවින් ඔහුව මේවා මගින් යදින්න. ඔහුගේ ගුණාංගයන් පිළිබඳව දෝෂාරෝපණය කරන්නන්ව අත්හැර දමන්න. ඔවුන් කළදේ වෙනුවට ඔවුන්ට ඵලවිපාක දෙනු ලබනු ඇත.

وَمِمَّنْ خَلَقْنَآ اُمَّةٌ يَّهْدُوْنَ بِالْحَقِّ وَبِهٖ يَعْدِلُوْنَ ﴿١٨١﴾

182. අප මවා ඇති අය අතර සත්‍යවාදීව, (මිනිසුන්ට) මග පෙන්වන, එමෙන්ම එමගින් සාධාරණය ඉටුකරන ජනකොටසක් වෙති.

وَالَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِنَا سَنَسْتَدْرِجُهُمْ مِّنْ حَيْثُ لَا يَعْلَمُوْنَ ﴿١٨٢﴾

183. තවද අපගේ සලකුණු ප්‍රතික්ෂේප කරන්නන්ව, අපි ක්‍රම-ක්‍රමයෙන් ඔවුනට නොදැනෙන ආකාරයට ඔවුන්ව (විනාශය කරා) ඇද දමන්නෙමු.

وَاُمْلِيْ لَهُمْ ؕ اِنَّ كَيْدِيْ مَتِيْنٌ ﴿١٨٣﴾

184. තවද මම ඔවුන්ට කාල අවකාශයක් දෙමි. නියතවශයෙන්ම මාගේ සැලැස්ම ප්‍රබලය.

اَوَلَمْ يَتَفَكَّرُوْا ٚ مَا بِصَاحِبِهِمْ مِّنْ جِنَّةٍ ؕ اِنْ هُوَ اِلَّا نَذِيْرٌ مُّبِيْنٌ ﴿١٨٤﴾

185. ඔවුන්ගේ සගයාට උමතු බවක් නොමැති බව ඔවුන් නොසිතුවේද? ඔහු හුදෙක් අවවාද කරන්නෙකු පමණි.

اَوَلَمْ يَنْظُرُوْا فِيْ مَلَكُوْتِ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا خَلَقَ اللّٰهُ مِنْ شَيْءٍ ۙ وَّاَنْ عَسٰٓى اَنْ يَّكُوْنَ قَدِ اقْتَرَبَ اَجَلُهُمْ ۚ فَبِاَيِّ حَدِيْثٍ ۭ بَعْدَهٗ يُؤْمِنُوْنَ ﴿١٨٥﴾

186. අහස් සහ පොළොවෙහි රාජ්‍යයන් මෙන්ම අල්ලාහ් විසින් මවන ලද සියළු දේ ගැන ඔවුන් නොබලන්නෝද? තවද ඔවුන් (තමන්ගේ) වාරය දැනටමත් ලංවී තිබෙයිදෝ යැයි (ඔවුන් නොදකින්නෝද)? එසේ නම් මින් පසු ඔවුන් කුමන දේ කෙරෙහි විශ්වාස කරන්නෝද?

مَنْ يُّضْلِلِ اللّٰهُ فَلَا هَادِيَ لَهٗ ؕ وَيَذَرُهُمْ فِيْ طُغْيَانِهِمْ يَعْمَهُوْنَ ﴿١٨٦﴾

187. කවරෙකුව අල්ලාහ් නොමගෙහි හැර දමන්නේද, ඔහුට කිසිම මගපෙන්වන්නෙකු නොමැත. තවද ඔවුන්ව තමන්ගේ සීමාව ඉක්මවීමෙහි අයාලේ යාමට ඔහු ඉඩ හරින්නේය.

يَسْـَٔلُوْنَكَ عَنِ السَّاعَةِ اَيَّانَ مُرْسٰهَا ؕ قُلْ اِنَّمَا عِلْمُهَا عِنْدَ رَبِّيْ ۚ لَا يُجَلِّيْهَا

188. එම මොහොත පිළිබඳව 'කවදා පැමිණෙන්නේ ද?' ඔවුන් ඔබගෙන් අසන්නෝය. 'එය පිළිබඳව

وقف لازم وقف منزل

لِوَقْتِهَآ اِلَّا هُوَ ۘ ثَقُلَتْ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ لَا تَاْتِيْكُمْ اِلَّا بَغْتَةً ؕ يَسْـَٔلُوْنَكَ كَاَنَّكَ حَفِىٌّ عَنْهَا ؕ قُلْ اِنَّمَا عِلْمُهَا عِنْدَ اللّٰهِ وَلٰـكِنَّ اَكْثَرَ النَّاسِ لَا يَعْلَمُوْنَ ﴿١٨٨﴾

දැනුම ඇත්තේ මාගේ අධිපතියාණන් වෙත පමණි. එය, එයට අදාල කාලයේ හෙළිදරව් කිරීමට ඔහුට හැර අන්කිසිවෙකුට නොහැක. එය අහස් සහ පොළොව මත බරක් වේ. එය සැනෙකින් මිස නුඹලා වෙත පැමිණෙන්නේ නැතැ'යි පවසන්න. එය පිළිබඳව ඔබ හොඳින් දන්නෙකු මෙන් ඔවුන් ඔබගෙන් අසති. 'එය පිළිබඳව දැනුම ඇත්තේ අල්ලාහ් වෙත පමණි. එහෙත් මිනිසුන් බොහෝ දෙනෙක් (එය) නොදනිති'යි පවසන්න.

قُلْ لَّاۤ اَمْلِكُ لِنَفْسِىْ نَفْعًا وَّلَا ضَرًّا اِلَّا مَا شَآءَ اللّٰهُ ؕ وَلَوْ كُنْتُ اَعْلَمُ الْغَيْبَ لَاسْتَكْثَرْتُ مِنَ الْخَيْرِ ۛۚ وَمَا مَسَّنِىَ السُّوْٓءُ ۛۚ اِنْ اَنَا اِلَّا نَذِيْرٌ وَّبَشِيْرٌ لِّقَوْمٍ يُّؤْمِنُوْنَ ﴿١٨٩﴾

معانقة عند المتأخرين

189. 'අල්ලාහ් අභිමත දේ හැර මා වෙනුවෙන් යහපතක් හෝ අයහපතක් කර ගැනීමට මට ශක්තියක් නැත. තවද අදෘෂ්‍යමාන දේ පිළිබඳව මට දැනුමක් තිබුණි නම් මා වෙනුවෙන් අධික යහපතක් ඇති කර ගැනීමට මට හැකිවන්නට තිබුණි. තවද මාහට කිසිඳු නපුරක් අත්වන්නට ඉඩ නොතිබුණි. මම විශ්වාස කරන ජනතාවට අවවාද කරන්නෙකු මෙන්ම ශුභාරංචි ගෙන එන්නෙකුද පමණක් වෙමි.' යි පවසන්න.

هُوَ الَّذِىْ خَلَقَكُمْ مِّنْ نَّفْسٍ وَّاحِدَةٍ وَّجَعَلَ مِنْهَا زَوْجَهَا لِيَسْكُنَ اِلَيْهَا ۚ فَلَمَّا تَغَشّٰٮهَا حَمَلَتْ حَمْلًا خَفِيْفًا فَمَرَّتْ بِهٖ ۚ فَلَمَّاۤ اَثْقَلَتْ دَّعَوَا اللّٰهَ رَبَّهُمَا لَئِنْ اٰتَيْتَنَا صَالِحًا لَّنَكُوْنَنَّ مِنَ الشّٰكِرِيْنَ ﴿١٩٠﴾

190. එකම ජීවයකින් නුඹලාව මවා තවද එමගින් එයගේ සහකරුද තනා ඇත්තේ ඔහුමය. ඇයගෙන් ඔහු(සහකරු) සුව පහසුව ලබාගැනීම පිණිසය. ඔහු ඇයව වසාගත් කල්හි ඇය ගැබ් ගෙන සැහැල්ලු බරක් දරමින් සක්මන් කළාය. තවද ඇය බරව වැඩුණු විට ඔවුන් දෙදෙනාම අල්ලාහ්ට 'ඔබ අපට නිරෝගී බිය බැතිමත් දරුවෙකු ලබාදෙන්නේ නම් නියතවශයෙන්ම අපි කෘතඥ වන්නෙමු'යි යාච්ඤා කළහ.

فَلَمَّاۤ اٰتٰٮهُمَا صَالِحًا جَعَلَا لَهٗ شُرَكَآءَ فِيْمَاۤ اٰتٰٮهُمَا ۚ فَتَعٰلَى اللّٰهُ عَمَّا يُشْرِكُوْنَ ﴿١٩١﴾

191. නමුත් ඔහු ඔවුන්ට යහපත් (දරුවෙකු) ලබාදුන්විට ඔහු ඔවුන්ට දුන් දෙයින් ඔහුට සමානයන් තබන්නෝය. නමුත් ඔවුන් (ඔහුට) සමාන තබන දෙයට වඩා අල්ලාහ් උසස්ය.

192. කිසිම මැවීමක් නොකරන මෙන්ම තමන්වම මවනු ලැබුවන් වන ඔවුන්ව, ඔවුන් (ඔහුට) සමාන තබන්නේද?

أَيُشْرِكُونَ مَا لَا يَخْلُقُ شَيْئًا وَهُمْ يُخْلَقُونَ ﴿١٩٢﴾

193. තවද මොවුන්ට පිහිට වීමට ඔවුන්ට නොහැකි මෙන්ම ඔවුන්ට තමන්ටම පිහිටවීමටද නොහැක.

وَلَا يَسْتَطِيعُونَ لَهُمْ نَصْرًا وَلَا أَنْفُسَهُمْ يَنْصُرُونَ ﴿١٩٣﴾

194. තවද නුඹලා ඔවුන්ව යහ මගට කැඳවුවේ නම් ඔවුන් නුඹලාව අනුගමනය නොකරන්නෝය. නුඹලා ඔවුන්ව කැඳවුවද නිශ්ශබ්දව සිටියද එය නුඹලාට සමානය.

وَإِنْ تَدْعُوهُمْ إِلَى الْهُدَىٰ لَا يَتَّبِعُوكُمْ ۚ سَوَاءٌ عَلَيْكُمْ أَدَعَوْتُمُوهُمْ أَمْ أَنْتُمْ صَامِتُونَ ﴿١٩٤﴾

195. නියතවශයෙන්ම, අල්ලාහ් හැරෙන්නට නුඹලා කැඳවන අය නුඹලා වැනිම (හුදු) ගැත්තන් පමණි. එසේනම් ඔවුන්ව කැඳවනු, නුඹලා සත්‍යවාදී වේනම් නුඹලාට පිළිතුරු දෙනු ඇත.

إِنَّ الَّذِينَ تَدْعُونَ مِنْ دُونِ اللَّهِ عِبَادٌ أَمْثَالُكُمْ ۖ فَادْعُوهُمْ فَلْيَسْتَجِيبُوا لَكُمْ إِنْ كُنْتُمْ صَادِقِينَ ﴿١٩٥﴾

196. ඔවුන්ට ඇවිදීමට පාද තිබේද? ඇල්ලීමට දෑත් තිබේද? දැකීමට ඇස් තිබේද? ඇසීමට කන් තිබේද? 'නුඹලා (දෙවියන්ට) සමාන තබන්නන්ව කැඳවනු. පසුව (නුඹලා සියල්ලන්ම) මට විරුද්ධව කුමන්ත්‍රණ කරනු. මා හට කාල අවකාශයක් නොදෙනු'යි පවසන්න.

أَلَهُمْ أَرْجُلٌ يَمْشُونَ بِهَا ۖ أَمْ لَهُمْ أَيْدٍ يَبْطِشُونَ بِهَا ۖ أَمْ لَهُمْ أَعْيُنٌ يُبْصِرُونَ بِهَا ۖ أَمْ لَهُمْ آذَانٌ يَسْمَعُونَ بِهَا ۗ قُلِ ادْعُوا شُرَكَاءَكُمْ ثُمَّ كِيدُونِ فَلَا تُنْظِرُونِ ﴿١٩٦﴾

197. 'සත්තකින්ම මෙම ග්‍රන්ථය පහළ කළ අල්ලාහ් මාගේ ආරක්ෂකයාය. තවද ඔහු ධාර්මිෂ්ඨකයින්ව රැක ගන්නේය'.

إِنَّ وَلِيِّيَ اللَّهُ الَّذِي نَزَّلَ الْكِتَابَ ۖ وَهُوَ يَتَوَلَّى الصَّالِحِينَ ﴿١٩٧﴾

198. 'තවද නුඹලා ඔහු හැර කැඳවන්නන් හට නුඹලාට පිහිට

وَالَّذِينَ تَدْعُونَ مِنْ دُونِهِ لَا يَسْتَطِيعُونَ

نَصۡرَكُمۡ وَلَآ أَنفُسَهُمۡ يَنصُرُونَ ١٩٨

වීමට බලයක් නැති අතර ඔවුන්ට තමන්ටම පිහිටවීමටද නොහැක'.

وَإِن تَدۡعُوهُمۡ إِلَى ٱلۡهُدَىٰ لَا يَسۡمَعُواْۖ وَتَرَىٰهُمۡ يَنظُرُونَ إِلَيۡكَ وَهُمۡ لَا يُبۡصِرُونَ ١٩٩

199. තවද නුඹලා ඔවුන්ව යහ මගට කැඳවූවේ නම් ඔවුන් සවන් නොදෙති. තවද ඔවුන් ඔබ දෙස බලන්නන් සේ ඔබ දකින්නේය, නමුත් ඔවුන් නොබලන්නෝය.

خُذِ ٱلۡعَفۡوَ وَأۡمُرۡ بِٱلۡعُرۡفِ وَأَعۡرِضۡ عَنِ ٱلۡجَٰهِلِينَ ٢٠٠

200. සමාව ක්‍රියාවට නංවන්න. යහපත් දේ අණකරන්න. අඥානයින්ගෙන් ඉවත්වන්න.

وَإِمَّا يَنزَغَنَّكَ مِنَ ٱلشَّيۡطَٰنِ نَزۡغٞ فَٱسۡتَعِذۡ بِٱللَّهِۚ إِنَّهُۥ سَمِيعٌ عَلِيمٌ ٢٠١

201. තවද ෂෙයිතාන් වෙතින් නපුරු අදහසක් ඔබව පොලඹවන්නේ නම්, එවිට අල්ලාහ්ගෙන් සරණ පතන්න. නියතවශයෙන්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

إِنَّ ٱلَّذِينَ ٱتَّقَوۡاْ إِذَا مَسَّهُمۡ طَٰٓئِفٞ مِّنَ ٱلشَّيۡطَٰنِ تَذَكَّرُواْ فَإِذَا هُم مُّبۡصِرُونَ ٢٠٢

202. බිය බැතිමතුන් (ගත් කළ) ඔවුනට ෂෙයිතාන්ගෙන් අදහසක් ග්‍රහණය කරනවිට ඔවුහු (දෙවියන්) සිහිපත් කරති. තවද බලනු! ඔවුහු (සැමදේ නිවැරදිව) දැකීමට පටන් ගනිති.

وَإِخۡوَٰنُهُمۡ يَمُدُّونَهُمۡ فِي ٱلۡغَيِّ ثُمَّ لَا يُقۡصِرُونَ ٢٠٣

203. තවද ඔවුන්ගේ සොහොයුරන් ඔවුන්ව නිරතුරුවම වරදෙහි යොමුකරවති. තවද ඉන්පසුවත් ඔවුහු විඩාවට පත් නොවෙති.

وَإِذَا لَمۡ تَأۡتِهِم بِـَٔايَةٖ قَالُواْ لَوۡلَا ٱجۡتَبَيۡتَهَاۚ قُلۡ إِنَّمَآ أَتَّبِعُ مَا يُوحَىٰٓ إِلَيَّ مِن رَّبِّيۚ هَٰذَا بَصَآئِرُ مِن رَّبِّكُمۡ وَهُدٗى وَرَحۡمَةٞ لِّقَوۡمٖ يُؤۡمِنُونَ ٢٠٤

204. තවද ඔබ ඔවුන් වෙත සළකුණක් නොගෙනා විට 'ඔබ එය මවා නොපාන්නේ මක්නිසාදැ?' යි ඔවුහු කියති. පවසන්න 'මා අනුගමනය කරන්නේ මගේ අධිපතියාණන් ගෙන් මාවෙත අනාවරණය කරන ලද දේ පමණි. මේවා නුඹලාගේ අධිපතියාණන්ගෙන් වන දීප්තිමත් සළකුණු මෙන්ම විශ්වාස කරන ජනතාවට මගපෙන්වීමක්ද වරප්‍රසාදයක්ද වේ'.

وَإِذَا قُرِئَ الْقُرْآنُ فَاسْتَمِعُوا لَهُ وَأَنصِتُوا لَعَلَّكُمْ تُرْحَمُونَ ۝٢٠٥

205. තවද කුර්ආනය පාරායනය කරනු ලබන විට නුඹලාට දයාව දක්වනු ලබනු පිණිස එයට ඇහුම්කන් දෙනු, තවද නිශ්ශබ්ද වනු.

وَاذْكُر رَّبَّكَ فِي نَفْسِكَ تَضَرُّعًا وَخِيفَةً وَدُونَ الْجَهْرِ مِنَ الْقَوْلِ بِالْغُدُوِّ وَالْآصَالِ وَلَا تَكُن مِّنَ الْغَافِلِينَ ۝٢٠٦

206. තවද නිහතමානිව සහ බියෙන් යුතුව එමෙන්ම උස් හඬින් කථා කිරීමෙන් තොරව උදේ සහ සවස් කාලයන්හිදී ඔබගේ අධිපතියාණන්ව ඔබගේ සිතෙහි සිහිපත් කරන්න. තවද නොසැලකිලිමත් අයගෙන් නොවන්න.

إِنَّ الَّذِينَ عِندَ رَبِّكَ لَا يَسْتَكْبِرُونَ عَنْ عِبَادَتِهِ وَيُسَبِّحُونَهُ وَلَهُ يَسْجُدُونَ ۩ ۝٢٠٧

207. සත්තකින්ම ඔබගේ අධිපතියාණන්ට සමීප වන්නන්, ඔහුට නැමදීමෙන් අහංකාරයෙන් යුතුව නොහැරෙන්නෝය, එහෙත් ඔවුහු ඔහුව කීර්තිමත් කරන්නෝය. තවද ඔහු වෙත යටහත් පහත් වන්නෝය.




## අල් අන්ෆාල්
(මදිනාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

2. ඔවුන් ඔබගෙන් (යුද්ධයේදී) අත්පත් වූ දේවල් පිළිබඳව විමසති. පවසන්න, '(යුද්ධයේදී) අත්පත් වූ දේවල් අල්ලාහ් සහ දූතයාණන් සතුය. එබැවින් අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද නුඹලා අතර සෑම දේ යුක්තියෙන් සලසාගනු. තවද නුඹලා විශ්වාසිතයින් වන්නේ නම් අල්ලාහ්ට සහ දූතයාණන්ට අවනත වනු'.

يَسْـَٔلُوْنَكَ عَنِ الْاَنْفَالِ ؕ قُلِ الْاَنْفَالُ لِلّٰهِ وَالرَّسُوْلِ ۚ فَاتَّقُوا اللّٰهَ وَاَصْلِحُوْا ذَاتَ بَيْنِكُمْ ۠ وَاَطِيْعُوا اللّٰهَ وَرَسُوْلَهٗۤ اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ②

3. අල්ලාහ්(ගේ නාමය) සඳහන් කරනු ලබන විට කවුරුන්ගේ හදවත් වෙව්ලන්නේද ඔවුන්ම (සැබෑ) විශ්වාසිතයෝය. තවද ඔවුන් වෙත ඔහුගේ සලකුණු පාරායනා කරනු ලබන විට ඔවුන්ගේ විශ්වාසය වැඩි වන්නට පටන් ගන්නේය. තවද ඔවුන් සිය අධිපතියාණන් කෙරෙහි ඔවුන්ගේ දැඩි විශ්වාසය තබති.

اِنَّمَا الْمُؤْمِنُوْنَ الَّذِيْنَ اِذَا ذُكِرَ اللّٰهُ وَجِلَتْ قُلُوْبُهُمْ وَاِذَا تُلِيَتْ عَلَيْهِمْ اٰيٰتُهٗ زَادَتْهُمْ اِيْمَانًا وَّعَلٰى رَبِّهِمْ يَتَوَكَّلُوْنَ ۚۖ ③

4. ඔවුන් නමස්කාරයේ නිරතවෙති. තවද අප ඔවුනට සපයා ඇති දෙයින් වැය කරති.

الَّذِيْنَ يُقِيْمُوْنَ الصَّلٰوةَ وَمِمَّا رَزَقْنٰهُمْ يُنْفِقُوْنَ ؕ ④

5. සැබෑ විශ්වාසිතයින් වන්නේ මොවුන්මය. මොවුනට මොවුන්ගේ අධිපතියාණන් වෙත (තත්ත්වයේ) තරාතිරම්ද එලෙසම ක්ෂමාවද ගෞරවනීය ජීවනෝපායද ඇත.

اُولٰٓئِكَ هُمُ الْمُؤْمِنُوْنَ حَقًّا ؕ لَهُمْ دَرَجٰتٌ عِنْدَ رَبِّهِمْ وَمَغْفِرَةٌ وَّرِزْقٌ كَرِيْمٌ ۚ ⑤

6 විශ්වාසිතයින්ගෙන් පිරිසක් පිළිකුල් කළද ඔබගේ අධිපතියාණන් යහපත් අරමුණකට ඔබව ඔබගේ නිවසින් පිටමං කළේ (ඔහු ඔබගේ සතුරාට එරෙහිව ඔබට පිහිට වූ හෙයින්) ය.

كَمَاۤ اَخْرَجَكَ رَبُّكَ مِنْۢ بَيْتِكَ بِالْحَقِّ ۠ وَاِنَّ فَرِيْقًا مِّنَ الْمُؤْمِنِيْنَ لَكٰرِهُوْنَ ۙ ⑥

7. සත්‍යය ප්‍රත්‍යක්ෂ වූවායින් පසු ඔවුන්ව මරණය වෙත ඇදගෙන යන්නාක් මෙන් ඔවුන් එය ඒකාන්තයෙන්ම දුටුවත් ඒ පිළිබඳව ඔවුන් ඔබ හා වාද කරති.

يُجَادِلُونَكَ فِي الْحَقِّ بَعْدَ مَا تَبَيَّنَ كَأَنَّمَا يُسَاقُونَ إِلَى الْمَوْتِ وَهُمْ يَنْظُرُونَ ﴿٧﴾

8. එමෙන්ම දෙපාර්ශවයන්ගෙන්◆ එකක්, එය නුඹලාටම යැයි අල්ලාහ් පොරොන්දු වූ අවස්ථාව (සිහිපත් කරනු). තවද නුඹලා කැමති වූයේ ආයුධ වලින් තොර එකටය. එහෙත් අල්ලාහ් තම වදන් මගින් සත්‍යය ස්ථාපිත කිරීමටත් අවිශ්වාසිතයින්ව මුලිනුපුටා දැමීමටත් අභිමත කළේය.

وَإِذْ يَعِدُكُمُ اللَّهُ إِحْدَى الطَّائِفَتَيْنِ أَنَّهَا لَكُمْ وَتَوَدُّونَ أَنَّ غَيْرَ ذَاتِ الشَّوْكَةِ تَكُونُ لَكُمْ وَيُرِيدُ اللَّهُ أَنْ يُحِقَّ الْحَقَّ بِكَلِمَاتِهِ وَيَقْطَعَ دَابِرَ الْكَافِرِينَ ﴿٨﴾

9. වරදකරුවන් එයට අකමැති වුවද, ඔහු සත්‍යය ස්ථාපිත කිරීමටත් අසත්‍යය නිෂ්ඵල කිරීමටත් (කැමති වූයේ)ය.

لِيُحِقَّ الْحَقَّ وَيُبْطِلَ الْبَاطِلَ وَلَوْ كَرِهَ الْمُجْرِمُونَ ﴿٩﴾

10. නුඹලා නුඹලාගේ අධිපතියාණන්ගෙන් සහාය පැතූ විට 'එකිනෙකා පසුපස එන සුර දූතයින් දහසක් මගින් මම නුඹලාට සහාය වන්නෙමි' යි (කියමින්) ඔහු නුඹලාට පිළිතුරු දුන්නේය.

إِذْ تَسْتَغِيثُونَ رَبَّكُمْ فَاسْتَجَابَ لَكُمْ أَنِّي مُمِدُّكُمْ بِأَلْفٍ مِنَ الْمَلَائِكَةِ مُرْدِفِينَ ﴿١٠﴾

11. තවද මෙමගින් නුඹලාගේ හදවත් සැනසීම පිණිස අල්ලාහ් මෙය ශුභාරංචියක් ලෙසම කළේය. තවද උදව් ලැබෙන්නේ අල්ලාහ් වෙතින්ම පමණි. සත්තකින්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَمَا جَعَلَهُ اللَّهُ إِلَّا بُشْرَىٰ وَلِتَطْمَئِنَّ بِهِ قُلُوبُكُمْ ۚ وَمَا النَّصْرُ إِلَّا مِنْ عِنْدِ اللَّهِ ۚ إِنَّ اللَّهَ عَزِيزٌ حَكِيمٌ ﴿١١﴾ ع

12. ආරක්ෂාවේ (සළකුණක්) සේ ඔහු නුඹලාට නින්ද යෑමට සැලැස්වූ

إِذْ يُغَشِّيكُمُ النُّعَاسَ أَمَنَةً مِنْهُ وَيُنَزِّلُ

◆ එනම් අති සන්නද්ධ මක්කම හමුදාව සහ සුළු අවි පමණක් සහිතව උතුරේ සිට මක්කම බලා යමින් සිටි තවලමද වේ.

විට, එමෙන්ම නුඹලාට වලාකුළුවලින් ජලය පහල කළේ එමගින් නුඹලාව පිරිසිදු කිරීමටද, ෂෙයිතාන්ගේ අපවිත්‍රය නුඹලාගෙන් ඉවත් කිරීමටද, නුඹලාගේ හදවත් ශක්තිමත් කිරීමටද (නුඹලාගේ) පාදයන් ස්ථිර කිරීමටද වේ.

عَلَيْكُمْ مِّنَ السَّمَاءِ مَاءً لِّيُطَهِّرَكُم بِهِ وَيُذْهِبَ عَنكُمْ رِجْزَ الشَّيْطَانِ وَلِيَرْبِطَ عَلَىٰ قُلُوبِكُمْ وَيُثَبِّتَ بِهِ الْأَقْدَامَ ﴿١٢﴾

13. ඔබගේ අධිපතියාණන් සුර දූතයන් වෙත 'මා ඔබලා සමගය. එහෙයින් විශ්වාස කරන අයට ස්ථිරභාවය ලබා දෙනු. මම අවිශ්වාස කරන අයගේ හදවත් තුලට භීතිය ඇති කරන්නෙමි. (ඔවුන්ගේ) ගෙලට ඉහලින් පහර දෙනු. තවද ඔවුන්ගේ ඇඟිලි තුඩුවලට පහර දෙනු'යි (පවසමින්) අනාවරණය කළ අවස්ථාව (සිහිපත් කරනු).

إِذْ يُوحِي رَبُّكَ إِلَى الْمَلَائِكَةِ أَنِّي مَعَكُمْ فَثَبِّتُوا الَّذِينَ آمَنُوا ۚ سَأُلْقِي فِي قُلُوبِ الَّذِينَ كَفَرُوا الرُّعْبَ فَاضْرِبُوا فَوْقَ الْأَعْنَاقِ وَاضْرِبُوا مِنْهُمْ كُلَّ بَنَانٍ ﴿١٣﴾

14. එය මක් නිසාද යත්, ඔවුන් අල්ලාහ්ටත් ඔහුගේ දූතයාණන්ටත් විරුද්ධ වූ හෙයිනි. තවද කවුරුන් හෝ අල්ලාහ්ටත් ඔහුගේ දූතයාණන්ටත් විරුද්ධ වන්නේද එවිට අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

ذَٰلِكَ بِأَنَّهُمْ شَاقُّوا اللَّهَ وَرَسُولَهُ ۚ وَمَن يُشَاقِقِ اللَّهَ وَرَسُولَهُ فَإِنَّ اللَّهَ شَدِيدُ الْعِقَابِ ﴿١٤﴾

15. එය (නුඹලාගේ දඬුවම වේ) එහෙයින් එය විඳිනු. තවද අවිශ්වාසිතයින්ට ගින්නෙහි දඬුවම ඇති බව (දැනගනු).

ذَٰلِكُمْ فَذُوقُوهُ وَأَنَّ لِلْكَافِرِينَ عَذَابَ النَّارِ ﴿١٥﴾

16. එම්බල විශ්වාසිතයිනි! ඉදිරියට එන අවිශ්වාස කරන අයගේ බලඇණිය හමුවූ විට, ඔවුනට (නුඹලාගේ) පිට නොහරවනු.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا إِذَا لَقِيتُمُ الَّذِينَ كَفَرُوا زَحْفًا فَلَا تُوَلُّوهُمُ الْأَدْبَارَ ﴿١٦﴾

17. තවද යුධ උපක්‍රමයක් වශයෙන් හෝ (වෙනත්) කණ්ඩායමකට එකතුවීමට හෝ හැරෙන්නට එදිනෙහි ඔවුනට පිට හරවන කවරෙකු හෝ වේවා ඔහු අල්ලාහ්ගේ මහත් කෝපය ලඟා කර ගනී. එමෙන්ම ඔහුගේ වාසස්ථානය නිරය වන්නේය. එය ඉතා නපුරු වාසස්ථානයක් වේ.

وَمَن يُوَلِّهِمْ يَوْمَئِذٍ دُبُرَهُ إِلَّا مُتَحَرِّفًا لِّقِتَالٍ أَوْ مُتَحَيِّزًا إِلَىٰ فِئَةٍ فَقَدْ بَاءَ بِغَضَبٍ مِّنَ اللَّهِ وَمَأْوَاهُ جَهَنَّمُ ۖ وَبِئْسَ الْمَصِيرُ ﴿١٧﴾

18. තවද නුඹලා ඔවුන්ව ඝාතනය නොකළෙහුය, එහෙත් ඔවුන්ව ඝාතනය කළේ අල්ලාහ්මය. ඔබ විසි කළත්, විසි කළේ ඔබ නොවේ. නමුත් විසි කළේ අල්ලාහ්මය. තවද එය ඔහු වෙතින් විශ්වාසිතයින් හට පිරික්සුමකි. එනම් යහපත් පිරික්සුමක් විය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

فَلَمْ تَقْتُلُوهُمْ وَلَٰكِنَّ اللَّهَ قَتَلَهُمْ ۚ وَمَا رَمَيْتَ إِذْ رَمَيْتَ وَلَٰكِنَّ اللَّهَ رَمَىٰ ۚ وَلِيُبْلِيَ الْمُؤْمِنِينَ مِنْهُ بَلَاءً حَسَنًا ۚ إِنَّ اللَّهَ سَمِيعٌ عَلِيمٌ ﴿١٨﴾

19. (සිදුවූයේ) එයමය. එමෙන්ම (දැනගනු) අවිශ්වාසිතයින්ගේ උපාය දුර්වල කරන්නේ අල්ලාහ්මය.

ذَٰلِكُمْ وَأَنَّ اللَّهَ مُوهِنُ كَيْدِ الْكَافِرِينَ ﴿١٩﴾

20. (විශ්වාසිතයිනි) නුඹලා (ජයග්‍රාහී) විනිශ්චයක් පතන්නේ නම්, සත්තකින්ම විනිශ්චය නුඹලා වෙත පැමිණ ඇත. තවද (අවිශ්වාසිතයින් වන) නුඹලා වැළකී සිටින්නේ නම් මෙය නුඹලාට වඩාත් හොඳය. තවද නුඹලා (එදිරිවාදිකමට) හැරෙන්නේ නම්, අපිද හැරෙන්නෙමු. තවද නුඹලාගේ පිරිස ගණනින් කොතරම් අධික වුවද එය නුඹලාට කිසිඳු පළක් නොවන්නේය. තවද (දැනගනු) අල්ලාහ් විශ්වාසිතයින් සමග සිටින්නේය.

إِن تَسْتَفْتِحُوا فَقَدْ جَاءَكُمُ الْفَتْحُ ۖ وَإِن تَنتَهُوا فَهُوَ خَيْرٌ لَّكُمْ ۖ وَإِن تَعُودُوا نَعُدْ ۖ وَلَن تُغْنِيَ عَنكُمْ فِئَتُكُمْ شَيْئًا وَلَوْ كَثُرَتْ وَأَنَّ اللَّهَ مَعَ الْمُؤْمِنِينَ ﴿٢٠﴾

21. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ටත්, ඔහුගේ දූතයාණන්ටත් අවනත වනු, (දූතයාණන් පවසන දෙයට) නුඹලා සවන් දෙමින් සිටියදී ඔහුට පිටු නොපානු.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا أَطِيعُوا اللَّهَ وَرَسُولَهُ وَلَا تَوَلَّوْا عَنْهُ وَأَنتُمْ تَسْمَعُونَ ﴿٢١﴾

22. තවද ඔවුන් සවන් නොදෙන නමුත් 'අපි සවන් දෙන්නෙමු'යි පවසන අය මෙන් නුඹලාද නොවනු.

وَلَا تَكُونُوا كَالَّذِينَ قَالُوا سَمِعْنَا وَهُمْ لَا يَسْمَعُونَ ﴿٢٢﴾

23. ඇත්තෙන්ම අල්ලාහ්ගේ දැක්මෙහි ඉතා නරක තිරිසනුන් වනුයේ, දැනීමක් නැති බිහිරින් සහ ගොළුවන් වැනි අයවලුන්ය.

إِنَّ شَرَّ الدَّوَابِّ عِندَ اللَّهِ الصُّمُّ الْبُكْمُ الَّذِينَ لَا يَعْقِلُونَ ﴿٢٣﴾

24. අල්ලාහ් ඔවුන් තුළ කිසියම්

وَلَوْ عَلِمَ اللَّهُ فِيهِمْ خَيْرًا لَّأَسْمَعَهُمْ ۖ

وَلَوْ اَسْمَعَهُمْ لَتَوَلَّوْا وَّهُمْ مُّعْرِضُوْنَ ٢٤

යහපතක් දැකගත්තේ නම්, නියතවශයෙන්ම ඔහු ඔවුනට සවන් දීමට සලස්වන්නට තිබුණි. තවද (දැන්) ඔහු ඔවුනට සවන් දීමට සැලැස්වූයේ නම්, ඔවුහු වැළකී පිටු පාන්නෝය.

يَاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اسْتَجِيْبُوْا لِلّٰهِ وَلِلرَّسُوْلِ اِذَا دَعَاكُمْ لِمَا يُحْيِيْكُمْ ۚ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ يَحُوْلُ بَيْنَ الْمَرْءِ وَقَلْبِهٖ وَاَنَّهٗٓ اِلَيْهِ تُحْشَرُوْنَ ٢٥

25. එම්බල විශ්වාසිතයිනි! ඔහු (දූතයා) නුඹලාට ජීවය ලබාදීම සඳහා ඔහු නුඹලාව කැඳවන විට, නුඹලා අල්ලාහ්ටත්, දූතයාණන්ටත් ප්‍රතිචාර දක්වනු. තවද අල්ලාහ් මිනිසාත් ඔහුගේ හදවතත් අතරට පැමිණෙන බවත් තවද නුඹලා ඔහු වෙතටම රැස් කරනු ලබන බවත් දැනගනු.

وَاتَّقُوْا فِتْنَةً لَّا تُصِيْبَنَّ الَّذِيْنَ ظَلَمُوْا مِنْكُمْ خَآصَّةً ۚ وَاعْلَمُوْٓا اَنَّ اللّٰهَ شَدِيْدُ الْعِقَابِ ٢٦

26. විපත්තියකින් ප්‍රවේසම් වනු. එය නුඹලා අතරෙහි වරද කළවුන් හට පමණක් විශේෂයෙන් පහර දෙන්නක් නොවන්නේය. එමෙන්ම අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩි බවද දැනගනු.

وَاذْكُرُوْٓا اِذْ اَنْتُمْ قَلِيْلٌ مُّسْتَضْعَفُوْنَ فِى الْاَرْضِ تَخَافُوْنَ اَنْ يَّتَخَطَّفَكُمُ النَّاسُ فَاٰوٰىكُمْ وَاَيَّدَكُمْ بِنَصْرِهٖ وَرَزَقَكُمْ مِّنَ الطَّيِّبٰتِ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ٢٧

27. තවද නුඹලා ස්වල්පයක්ව සිටියදීත්, පොළොවෙහි දුබලයින් ලෙස සලකනු ලැබූ විටදීත්, මිනිසුන් නුඹලාව පැහැර ගනියි යන බියෙන් සිටියදීත්, නුඹලා කෘතඥවනු පිණිස, ඔහු නුඹලාට වාසස්ථානය දී, ඔහුගේ උදව්වෙන් නුඹලාව ශක්තිමත් කර, ඔහු නුඹලාට ජීවනෝපාය සැපයූ (අවස්ථාව) සිහිපත් කරනු.

يَاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَخُوْنُوا اللّٰهَ وَالرَّسُوْلَ وَتَخُوْنُوْٓا اَمٰنٰتِكُمْ وَاَنْتُمْ تَعْلَمُوْنَ ٢٨

28. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ්ටද දූතයාණන්ටද විශ්වාස ද්‍රෝහී නොකරනු. තැතහොත් නුඹලා දැනුවත්වම, නුඹලාමත විශ්වාසයෙන් පවරා ඇති දෑට (නිතරම) විශ්වාස ද්‍රෝහී කරන්නෙහුය.

وَاعْلَمُوْٓا اَنَّمَآ اَمْوَالُكُمْ وَاَوْلَادُكُمْ

29. තවද නුඹලාගේ වස්තූන්ද

ع
فِتْنَةٌ ۙ وَّاَنَّ اللّٰهَ عِنْدَهٗۤ اَجْرٌ عَظِيْمٌ ﴿٢٩﴾

නුඹලාගේ දරුවන්ද හුදු පිරික්සුමක් බවත් අල්ලාහ් වෙත ඉමහත් වූ තිළිණ ඇති බවත් දැනගනු.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِنْ تَتَّقُوا اللّٰهَ يَجْعَلْ لَّكُمْ فُرْقَانًا وَّيُكَفِّرْ عَنْكُمْ سَيِّاٰتِكُمْ وَيَغْفِرْ لَكُمْ ؕ وَاللّٰهُ ذُو الْفَضْلِ الْعَظِيْمِ ﴿٣٠﴾

30. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ් කෙරෙහි බිය දක්වන්නේ නම්, ඔහු නුඹලාට විශිෂ්ටත්වයක් ලබා දෙන්නේය. එමෙන්ම නුඹලාගේ අයහපත් නුඹලාගෙන් ඉවත් කර නුඹලාට සමාව දෙන්නේය. එමෙන්ම අල්ලාහ් ඉමහත් ත්‍යාගශීලිය.

وَاِذْ يَمْكُرُ بِكَ الَّذِيْنَ كَفَرُوْا لِيُثْبِتُوْكَ اَوْ يَقْتُلُوْكَ اَوْ يُخْرِجُوْكَ ؕ وَيَمْكُرُوْنَ وَيَمْكُرُ اللّٰهُ ؕ وَاللّٰهُ خَيْرُ الْمٰكِرِيْنَ ﴿٣١﴾

31. තවද අවිශ්වාසිතයින් ඔබව සිරභාරයට ගැනීමට හෝ ඔබව ඝාතනය කිරීමට හෝ ඔබව නෙරපා දැමීමට ඔබට එරෙහිව කුමන්ත්‍රණය කළ (අවස්ථාව සිහිපත් කරන්න.) තවද ඔවුන් සැලැසුම් කළෝය. අල්ලාහ්(ද) සැලැසුම් කළේය. තවද සැලැසුම් කරන්නන්ගෙන් අල්ලාහ් ශ්‍රේෂ්ඨයාය.

وَاِذَا تُتْلٰى عَلَيْهِمْ اٰيٰتُنَا قَالُوْا قَدْ سَمِعْنَا لَوْ نَشَآءُ لَقُلْنَا مِثْلَ هٰذَاۤ ۙ اِنْ هٰذَاۤ اِلَّاۤ اَسَاطِيْرُ الْاَوَّلِيْنَ ﴿٣٢﴾

32. එමෙන්ම ඔවුන් වෙත අපගේ වදන් පාරායණය කරනු ලැබූ විට, ඔවුහු 'අපි අසා ඇත්තෙමු. අපි කැමැති වුයේ නම් ඇත්තෙන්ම, මෙවැනිම දේ අපටත් කිව හැකිය. මෙය (හුදෙක්ම) පැරැන්නන්ගේ කතන්දර මිස අන් කිසිවක් නොවේ'යි කියති.

وَاِذْ قَالُوا اللّٰهُمَّ اِنْ كَانَ هٰذَا هُوَ الْحَقَّ مِنْ عِنْدِكَ فَاَمْطِرْ عَلَيْنَا حِجَارَةً مِّنَ السَّمَآءِ اَوِ ائْتِنَا بِعَذَابٍ اَلِيْمٍ ﴿٣٣﴾

33. තවද 'ඕ අල්ලාහ්! ඇත්තෙන්ම මෙය ඔබ වෙතින්ම වූ සත්‍යය වේ නම්, ඔබ අප මත අහසින් ගල් වස්සන්නට සලස්වනු. නැතහොත් අප වෙත වේදනාකාරී දඬුවමක් ගෙන එනු'යි ඔවුන් පැවසූ විට (එම අවස්ථාව සිහි කරනු.)

وَمَا كَانَ اللّٰهُ لِيُعَذِّبَهُمْ وَاَنْتَ فِيْهِمْ ؕ وَمَا كَانَ اللّٰهُ مُعَذِّبَهُمْ وَهُمْ يَسْتَغْفِرُوْنَ ﴿٣٤﴾

34. එහෙත් ඔබ ඔවුන් අතරෙහි සිටින අවස්ථාවෙහි අල්ලාහ් ඔවුනට දඬුවම් නොකරන්නේය. තවද ඔවුන් සමාව අයැදමින් සිටින අවස්ථාවේදීද අල්ලාහ් ඔවුනට දඬුවම් නොකරන්නේය.

وَمَا لَهُمْ اَلَّا يُعَذِّبَهُمُ اللّٰهُ وَهُمْ

35. තවද ඔවුන් එහි (සැබෑ)

يَصُدُّونَ عَنِ الْمَسْجِدِ الْحَرَامِ وَمَا كَانُوا أَوْلِيَاءَهُ ۚ إِنْ أَوْلِيَاؤُهُ إِلَّا الْمُتَّقُونَ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿٣٥﴾

භාරකරුවන්ව නොසිටියදී ඔවුන් ශුද්ධ වූ නැමදුම් ස්ථානයෙන් (මිනිසුන්ව) වළක්වන විට, අල්ලාහ් ඔවුනට දඬුවම් නොදී සිටීමට (දැන්) ඔවුන් වෙත කුමන හේතුවක් තිබේද? එහි (සැබෑ) භාරකරුවන් බියබැතිමත් අය පමණක් වෙති. එහෙත් ඔවුන්ගෙන් වැඩි දෙනෙක් නොදන්නෝය.

وَمَا كَانَ صَلَاتُهُمْ عِندَ الْبَيْتِ إِلَّا مُكَاءً وَتَصْدِيَةً ۚ فَذُوقُوا الْعَذَابَ بِمَا كُنتُمْ تَكْفُرُونَ ﴿٣٦﴾

36. තවද (ශුද්ධ) නිවසෙහි ඔවුන්ගේ නැමදුම නම්, සිවුරුවම් බෑම හා අත්පොළසන් දීම හැරෙන්නට අන් කිසිවක් නැත. 'එබැවින් නුඹලා අවිශ්වාස කළ හෙයින් දඬුවම් විඳිනු'.

إِنَّ الَّذِينَ كَفَرُوا يُنفِقُونَ أَمْوَالَهُمْ لِيَصُدُّوا عَن سَبِيلِ اللَّهِ ۚ فَسَيُنفِقُونَهَا ثُمَّ تَكُونُ عَلَيْهِمْ حَسْرَةً ثُمَّ يُغْلَبُونَ ۗ وَالَّذِينَ كَفَرُوا إِلَىٰ جَهَنَّمَ يُحْشَرُونَ ﴿٣٧﴾

37. නියතවශයෙන්ම අවිශ්වාසිත අය තමන්ගේ ධනය අල්ලාහ්ගේ මාර්ගයෙන් (ජනතාව) හරවනු පිණිස වැය කරති. ඔවුහු නියතවශයෙන්ම එය වැයකරමින් සිටින්නෝය. පසුව එහි ප්‍රතිඵලය වනුයේ ඔවුනට දුක සහ ශෝකය මිස අන් කිසිවක් නොවේ. පසුවද ඔවුන් (සියළු අතින්) පරාජයට පත් කරනු ලබන්නෝය. තවද අවිශ්වාසිතයින් නිරය වෙත එක් රැස් කරනු ලබන්නෝය.

لِيَمِيزَ اللَّهُ الْخَبِيثَ مِنَ الطَّيِّبِ وَيَجْعَلَ الْخَبِيثَ بَعْضَهُ عَلَىٰ بَعْضٍ فَيَرْكُمَهُ جَمِيعًا فَيَجْعَلَهُ فِي جَهَنَّمَ ۚ أُولَٰئِكَ هُمُ الْخَاسِرُونَ ﴿٣٨﴾

38. මෙය අල්ලාහ්, අපවිත්‍රය පවිත්‍රයෙන් වෙන්කිරීමටත් අපවිත්‍රය එකක් මත එකක් තබා, ඒවා එකට ගොඩ ගසා, පසුව ඒවා නිරයෙහි ඇද දැමීමටය. ඇත්තෙන්ම පාඩු විඳින්නන් මොවුන්මය.

قُل لِّلَّذِينَ كَفَرُوا إِن يَنتَهُوا يُغْفَرْ لَهُم مَّا قَدْ سَلَفَ وَإِن يَعُودُوا فَقَدْ مَضَتْ سُنَّتُ الْأَوَّلِينَ ﴿٣٩﴾

39. අවිශ්වාසිත අය වෙත පවසන්න, 'ඔවුන් වැළකී සිටියහොත් පෙර ඉකුත්වූ දේ වෙනුවෙන් ඔවුනට ක්ෂමාව දෙනු ලබන්නේය. තවද ඔවුන් (ඒවෙතට) ආපසු හැරෙන්නේ නම් එවිට සත්තකින්ම පෙර ජනතාවගේ ක්‍රියාපටිපාටිය ඔවුන්ට පෙර සිදුවී හමාරය.'

40. එමෙන්ම හිංසා පීඩාව නැතිවී ධර්මය මුළුමනින්ම අල්ලාහ්ට වන තුරු ඔවුන් සමඟ සටන් වදිනු. එහෙත් ඔවුන් වැළකී සිටියහොත්, එවිට නියතවශයෙන්ම අල්ලාහ් ඔවුන් කරන දේ ගැන සුපරීක්ෂාකාරීය.

وَقَاتِلُوهُمْ حَتَّىٰ لَا تَكُونَ فِتْنَةٌ وَيَكُونَ الدِّينُ كُلُّهُ لِلَّهِ ۚ فَإِنِ انتَهَوْا فَإِنَّ اللَّهَ بِمَا يَعْمَلُونَ بَصِيرٌ ﴿٤٠﴾

41. තවද ඔවුන් ආපසු හැරී යන්නේ නම් එවිට අල්ලාහ් නුඹලාගේ ආරක්ෂකයා බව දැනගනු. (ඔහු) කෙතරම් විශිෂ්ට ආරක්ෂකයා මෙන්ම කෙතරම් විශිෂ්ට උදව්කරුවා වන්නේද!

وَإِن تَوَلَّوْا فَاعْلَمُوا أَنَّ اللَّهَ مَوْلَاكُمْ ۚ نِعْمَ الْمَوْلَىٰ وَنِعْمَ النَّصِيرُ ﴿٤١﴾

10 කොටස

42. තවද නුඹලා අල්ලාහ් කෙරෙහිද, සේනාවන් දෙපිරිසක් හමුවූ දිනයේ එනම් විමංශනාත්මක දිනයේ (බද්ර් සටනේ) අපගේ දාසයා වෙත අප පහළ කළ දේ කෙරෙහිද, විශ්වාස කරන්නේ නම් නුඹලා (යුද්ධයේදී) අත්පත්වූ යම්දෙයක් ගත්තේද, ඉන් පහෙන් එකක් අල්ලාහ්ටද, දූතයාණන්ටද, සමීප ඥාතීන්ටද, අනාථයින්ටද, අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්ටද, මගීන්ටද, අයත් බව දැනගනු. තවද අල්ලාහ් සියළු දේ කිරීමට බලය ඇත්තාය.

وَاعْلَمُوا أَنَّمَا غَنِمْتُم مِّن شَيْءٍ فَأَنَّ لِلَّهِ خُمُسَهُ وَلِلرَّسُولِ وَلِذِي الْقُرْبَىٰ وَالْيَتَامَىٰ وَالْمَسَاكِينِ وَابْنِ السَّبِيلِ إِن كُنتُمْ آمَنتُم بِاللَّهِ وَمَا أَنزَلْنَا عَلَىٰ عَبْدِنَا يَوْمَ الْفُرْقَانِ يَوْمَ الْتَقَى الْجَمْعَانِ ۗ وَاللَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٤٢﴾

43. නුඹලා (නිම්නයට) සමීප ඉවුරෙහිද, ඔවුන් ඈත ඉවුරෙහිද සිට, තවලම නුඹලාට පහළින්ද වූවිට, (එම අවස්ථාව සිහිපත් කරනු). තවද (යුධවදින්නාවූ) නුඹලා (දෙපිරිස)ට ගැටුමට වේලාවක් තීරණය කිරීමට සිදුවුණි නම්, (නුඹලාගේම වාසියට හරවාගැනීමට) වේලාවක් පිළිබඳව නුඹලා වෙනස්වූ අදහස් දරන්නට ඉඩ තිබුණි. නමුත් අල්ලාහ් අභිමත කළාවූ දේම ඉටුකිරීමට එය එසේ සිදුවිය. පැහැදිලි සාධකයෙන් විනාශ වන්නට තීන්දු කරනු ලැබූවන් විනාශවීමටත්, පැහැදිලි සාධකයේ ශක්තියෙන් නොනැසී ජීවත්වෙන්නට වරම් ලැබෙන අය නොනැසී ජීවත්වීමටත් පෙරසේම ඉරණම වී තිබුණි. තවද නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දත්තාය.

إِذْ أَنتُم بِالْعُدْوَةِ الدُّنْيَا وَهُم بِالْعُدْوَةِ الْقُصْوَىٰ وَالرَّكْبُ أَسْفَلَ مِنكُمْ ۚ وَلَوْ تَوَاعَدتُّمْ لَاخْتَلَفْتُمْ فِي الْمِيعَادِ ۙ وَلَٰكِن لِّيَقْضِيَ اللَّهُ أَمْرًا كَانَ مَفْعُولًا لِّيَهْلِكَ مَنْ هَلَكَ عَن بَيِّنَةٍ وَيَحْيَىٰ مَنْ حَيَّ عَن بَيِّنَةٍ ۗ وَإِنَّ اللَّهَ لَسَمِيعٌ عَلِيمٌ ﴿٤٣﴾

44. අල්ලාහ් ඔබට ඔවුන්ව සුළු (පිරිසක්) බව සිහිනෙන් පෙන්වූවිට (එම අවස්ථාව සිහිකරන්න). තවද ඔවුන්ව විශාල (පිරිසක්) බව ඔහු ඔබට පෙන්වූයේ නම් නුඹලා නියතවශයෙන්ම අධෛර්යයමත් වනු ඇත. තවද එම කාරණය පිළිබඳව එකිනෙකා අතර මතභේද ඇති කරගනු ඇත. එහෙත් අල්ලාහ් (නුඹලාව) ආරක්ෂා කළේය. නියතවශයෙන්ම (නුඹලාගේ) සිත් තුළ ඇතිදේ පිළිබඳව ඔහුට සම්පූර්ණ දැනුමක් ඇත.

إِذْ يُرِيكَهُمُ اللَّهُ فِي مَنَامِكَ قَلِيلًا ۖ وَلَوْ أَرَاكَهُمْ كَثِيرًا لَّفَشِلْتُمْ وَلَتَنَازَعْتُمْ فِي الْأَمْرِ وَلَٰكِنَّ اللَّهَ سَلَّمَ ۗ إِنَّهُ عَلِيمٌ بِذَاتِ الصُّدُورِ ﴿٤٤﴾

45. තවද අල්ලාහ් අභිමත කළාවූ දේ ඉටුකිරීම සඳහා නුඹලාගේ සංග්‍රාම අවස්ථාවේදී නුඹලාගේ ඇස්වලට ඔවුන්ව සුළු ලෙස ඔහු නුඹලාට පෙන්වන්නටත්, ඔවුන්ගේ ඇස්වලට නුඹලාවද සුළු ලෙස පෙන්වන්නටත් සැලැස්වූ විට (එම අවස්ථාව සිහිපත් කරන්න). තවද (අවසන් තීන්දුව සඳහා) සියළු කටයුතු අල්ලාහ් වෙත යොමු කරනු ලබන්නේය.

وَإِذْ يُرِيكُمُوهُمْ إِذِ الْتَقَيْتُمْ فِي أَعْيُنِكُمْ قَلِيلًا وَيُقَلِّلُكُمْ فِي أَعْيُنِهِمْ لِيَقْضِيَ اللَّهُ أَمْرًا كَانَ مَفْعُولًا ۗ وَإِلَى اللَّهِ تُرْجَعُ الْأُمُورُ ﴿٤٥﴾

46. එම්බල විශ්වාසිතයිනි!, නුඹලා යුධ සේනාවක් හා ගැටෙන විට දැඩිව සිටිනු. තවද නුඹලා ජයග්‍රහණය කරනු පිණිස අල්ලාහ්ව බෙහෙවින්ම සිහිපත් කරනු.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا إِذَا لَقِيتُمْ فِئَةً فَاثْبُتُوا وَاذْكُرُوا اللَّهَ كَثِيرًا لَّعَلَّكُمْ تُفْلِحُونَ ﴿٤٦﴾

47. තවද අල්ලාහ්ටද ඔහුගේ දූතයාටද අවනත වනු. තවද එකිනෙකා අතර මතභේද ඇතිකර නොගනු. එසේ වුවානම් නුඹලා අධෛර්යයට පත්වී නුඹලාගේ බලය (නුඹලාගෙන්) ගිලිහී යනු ඇත. තවද ඉවසිලිමත් වනු. නියතවශයෙන්ම අල්ලාහ් ඉවසිලිවන්තයින් සමගය.

وَأَطِيعُوا اللَّهَ وَرَسُولَهُ وَلَا تَنَازَعُوا فَتَفْشَلُوا وَتَذْهَبَ رِيحُكُمْ ۖ وَاصْبِرُوا ۚ إِنَّ اللَّهَ مَعَ الصَّابِرِينَ ﴿٤٧﴾

48. තවද (තමන්ගේ ක්‍රියාවන් ගැන) ආත්ම වර්ණනා කිරීම පිණිසද මිනිසුන්ට ප්‍රදර්ශනය කිරීම පිණිසද අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව)

وَلَا تَكُونُوا كَالَّذِينَ خَرَجُوا مِن دِيَارِهِم بَطَرًا وَرِئَاءَ النَّاسِ

වලක්වාලනු පිණිසද තම නිවෙස් වලින් පිටත්වූවන් මෙන් නුඹලා නොවනු. තවද අල්ලාහ් ඔවුන් කරන සියලු දේ ග්‍රහණය කරන්නේය.

وَيَصُدُّونَ عَن سَبِيلِ اللَّهِ ۚ وَاللَّهُ بِمَا يَعْمَلُونَ مُحِيطٌ ﴿٤٨﴾

49. තවද ෂෙයිතාන් ඔවුන්ගේ ක්‍රියාවන් ඔවුන්ට අලංකාර කොට දක්වමින්, 'අද දින මිනිසුන්ගෙන් කිසිවෙකුටත් නුඹලාව අභිබවා යා නොහැක. මා නුඹලාගේ ආරක්ෂකයායැ'යි කියූ අවස්ථාව (සිහි කරනු). නමුත් යුද්ධ සේනා දෙක මුහුණට මුහුණලා හමුවූවිටදී, ඔහු තම පා විලුඹින් හැරී, 'ඇත්තෙන්ම මම නුඹලාගෙන් නිදහස් වෙමි. ඇත්තෙන්ම නුඹලා නොදකින දේ මම දකිමි. ඇත්තෙන්ම මම අල්ලාහ්ට බියවෙමි. තවද අල්ලාහ් දඬුවම් දීමෙහි දැඩියැ'යි කීවේය.

وَإِذْ زَيَّنَ لَهُمُ الشَّيْطَانُ أَعْمَالَهُمْ وَقَالَ لَا غَالِبَ لَكُمُ الْيَوْمَ مِنَ النَّاسِ وَإِنِّي جَارٌ لَّكُمْ ۖ فَلَمَّا تَرَاءَتِ الْفِئَتَانِ نَكَصَ عَلَىٰ عَقِبَيْهِ وَقَالَ إِنِّي بَرِيءٌ مِّنكُمْ إِنِّي أَرَىٰ مَا لَا تَرَوْنَ إِنِّي أَخَافُ اللَّهَ ۚ وَاللَّهُ شَدِيدُ الْعِقَابِ ﴿٤٩﴾

50. වංචනිකයින් සහ කවුරුන්ගේ හදවත්හි රෝගය ඇත්තේද ඔවුන්, 'මොවුන්ගේ ආගම මොවුන්ව මුලාකර ඇතැ'යි කියූ අවස්ථාව (සිහි කරනු). තවද අල්ලාහ් කෙරෙහි කවුරුන් හෝ විශ්වාස තබන්නේද එවිට නියතවශයෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥා සම්පන්නය.

إِذْ يَقُولُ الْمُنَافِقُونَ وَالَّذِينَ فِي قُلُوبِهِم مَّرَضٌ غَرَّ هَٰؤُلَاءِ دِينُهُمْ ۗ وَمَن يَتَوَكَّلْ عَلَى اللَّهِ فَإِنَّ اللَّهَ عَزِيزٌ حَكِيمٌ ﴿٥٠﴾

51. තවද 'දැවෙන දඬුවම විඳිනු!'(යි පවසමින්) සුරදූතයින් අවිශ්වාස කරන අයගේ මුහුණු වලට සහ ඔවුන්ගේ පිටුපසට පහර දෙමින්, ඔවුන්ගේ ආත්මයන් ඔවුන්ගෙන් අත්පත් කරගෙන යන විට ඔබට දැක ගත හැක්කේ නම්!

وَلَوْ تَرَىٰ إِذْ يَتَوَفَّى الَّذِينَ كَفَرُوا ۙ الْمَلَائِكَةُ يَضْرِبُونَ وُجُوهَهُمْ وَأَدْبَارَهُمْ وَذُوقُوا عَذَابَ الْحَرِيقِ ﴿٥١﴾

52. එය මක්නිසාදයත් නුඹලාගේ අත් (තමන්ට) පෙර යවා ඇති දේ (හේතුකොට ගෙන)ය. තවද අල්ලාහ් (තම) දාසයින්ට කිසිසේත්ම අසාධාරණ නොකරන්නේ යැ(යි දැනගනු).

ذَٰلِكَ بِمَا قَدَّمَتْ أَيْدِيكُمْ وَأَنَّ اللَّهَ لَيْسَ بِظَلَّامٍ لِّلْعَبِيدِ ﴿٥٢﴾

53. (ඔවුන්ගේ තත්ත්වය) ෆිර්අවුන්ගේ ජනයාගේ සහ ඔවුනට පෙර සිටියවුන්ගේ තත්ත්වයට සමානය. අල්ලාහ්ගේ සලකුණු කෙරෙහි ඔවුහු අවිශ්වාස කළහ. එබැවින් අල්ලාහ් ඔවුන්ගේ පාපයන් හේතුවෙන් ඔවුන්ට දඬුවම් කළේය. නියතවශයෙන්ම, අල්ලාහ් ශක්තිසම්පන්නය. (තවද) දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

كَدَأْبِ آلِ فِرْعَوْنَ وَالَّذِينَ مِن قَبْلِهِمْ كَفَرُوا بِآيَاتِ اللَّهِ فَأَخَذَهُمُ اللَّهُ بِذُنُوبِهِمْ إِنَّ اللَّهَ قَوِيٌّ شَدِيدُ الْعِقَابِ ﴿٥٣﴾

54. මෙයට හේතුව වන්නේ ඔවුන් තම තමන්ගේ තත්ත්වයන් වෙනස් කරගන්නා තුරු කිසිසේත් අල්ලාහ් ජනතාව කෙරෙහි පිරිනැමූ අනුග්‍රහය ඔහු වෙනස් නොකරන බැවිනි. තවද (දැනගනු) අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

ذَٰلِكَ بِأَنَّ اللَّهَ لَمْ يَكُ مُغَيِّرًا نِّعْمَةً أَنْعَمَهَا عَلَىٰ قَوْمٍ حَتَّىٰ يُغَيِّرُوا مَا بِأَنفُسِهِمْ وَأَنَّ اللَّهَ سَمِيعٌ عَلِيمٌ ﴿٥٤﴾

55. (ඔවුන්ගේ තත්ත්වය) ෆිර්අවුන්ගේ ජනයාගේ සහ ඔවුනට පෙර සිටියවුන්ගේ තත්ත්වයට සමානය. ඔවුන්ගේ අධිපතියාණන්ගේ සලකුණු ඔවුහු ප්‍රතික්ෂේප කළහ. එබැවින් අපි ඔවුන්ගේ පාපයන් හේතුවෙන් ඔවුන්ව විනාශ කළෙමු. තවද අපි ෆිර්අවුන්ගේ ජනතාව ගිල්වූයෙමු. ඔවුහු සියළුදෙනාම වරදකරුවන්ව සිටියහ.

كَدَأْبِ آلِ فِرْعَوْنَ وَالَّذِينَ مِن قَبْلِهِمْ كَذَّبُوا بِآيَاتِ رَبِّهِمْ فَأَهْلَكْنَاهُم بِذُنُوبِهِمْ وَأَغْرَقْنَا آلَ فِرْعَوْنَ وَكُلٌّ كَانُوا ظَالِمِينَ ﴿٥٥﴾

56. ඇත්තෙන්ම අල්ලාහ්ගේ දැක්මෙහි ඉතා නරක මැවීම් වනුයේ, අකෘතඥවන අයවලුන්ය. එබැවින් ඔවුහු විශ්වාස නොකරන්නෝය.

إِنَّ شَرَّ الدَّوَابِّ عِندَ اللَّهِ الَّذِينَ كَفَرُوا فَهُمْ لَا يُؤْمِنُونَ ﴿٥٦﴾

57. ඔබ කවුරුන් හෝ සමග ගිවිසුමක් ඇති කරගන්නේද එවිට ඔවුහු සෑමවිටම තමන්ගේ ගිවිසුම කඩකරන්නෝය. තවද ඔවුහු දෙවියන් කෙරෙහි බිය නොදක්වති.

الَّذِينَ عَاهَدتَّ مِنْهُمْ ثُمَّ يَنقُضُونَ عَهْدَهُمْ فِي كُلِّ مَرَّةٍ وَهُمْ لَا يَتَّقُونَ ﴿٥٧﴾

58. එබැවින් ඔබ ඔවුන් සමග සටනෙහි ගැටුනේ නම් ඔවුනට දැනමුතුකම් ලබනු පිණිස ඔවුන් සමග ඔවුන්ගේ පිටුපසෙහි සිටින්නන්ව (පලවාහැරීමකින්) බිය වද්දවන්න.

فَإِمَّا تَثْقَفَنَّهُمْ فِي الْحَرْبِ فَشَرِّدْ بِهِم مَّنْ خَلْفَهُمْ لَعَلَّهُمْ يَذَّكَّرُونَ ﴿٥٨﴾

59. තවද යම් ජන සමූහයකින් ද්‍රෝහී වීමක් වියහැකි යැයි ඔබට බියක් ඇතිවන්නේ නම් (ඔවුන්ගේ ගිවිසුම) ඒහා සමාන ලෙස ඔවුන් වෙත හැරදමන්න. නියතවශයෙන්ම ද්‍රෝහිකම් කරන්නන්ට අල්ලාහ් ප්‍රිය නොකරයි.

وَإِمَّا تَخَافَنَّ مِن قَوْمٍ خِيَانَةً فَانبِذْ إِلَيْهِمْ عَلَىٰ سَوَاءٍ ۚ إِنَّ اللَّهَ لَا يُحِبُّ الْخَائِنِينَ ﴿٥٩﴾

60. තවද අවිශ්වාසිතයින් වන ඔවුන් අභිබවා ගොස් ඇතැයි නොසිතිය යුතුය. නියතවශයෙන්ම ඔවුන්ට (දෙවියන්ගේ අරමුණ) නිෂ්ඵල කළ නොහැක.

وَلَا يَحْسَبَنَّ الَّذِينَ كَفَرُوا سَبَقُوا ۚ إِنَّهُمْ لَا يُعْجِزُونَ ﴿٦٠﴾

61. තවද නුඹලාට හැකි පමණින් (සන්නද්ධ) සේනාවද දේශ සීමාවේ අශ්වාරෝහක මුර කණ්ඩායමද ඔවුන් සඳහා සූදානම් කරගනු. නුඹලා එමගින් අල්ලාහ්ගේ සතුරාවද නුඹලාගේ සතුරාවද බිය ගන්වනු. තවද මොවුන් හැර වෙනත් අයද සිටිති. නුඹලා ඔවුන්ව නොදන්නෙහුය. (නමුත්) අල්ලාහ් ඔවුන්ව දනී. තවද අල්ලාහ්ගේ මාර්ගයෙහි කුමන හෝ දෙයක් නුඹලා වැය කරන්නේද එයට සම්පූර්ණයෙන් නුඹලාට ආපසු ගෙවනු ලබන්නේය. තවද නුඹලාට අසාධාරණයක් කරනු නොලබන්නේය.

وَأَعِدُّوا لَهُم مَّا اسْتَطَعْتُم مِّن قُوَّةٍ وَمِن رِّبَاطِ الْخَيْلِ تُرْهِبُونَ بِهِ عَدُوَّ اللَّهِ وَعَدُوَّكُمْ وَآخَرِينَ مِن دُونِهِمْ لَا تَعْلَمُونَهُمُ اللَّهُ يَعْلَمُهُمْ ۚ وَمَا تُنفِقُوا مِن شَيْءٍ فِي سَبِيلِ اللَّهِ يُوَفَّ إِلَيْكُمْ وَأَنتُمْ لَا تُظْلَمُونَ ﴿٦١﴾

62. තවද ඔවුන් සාමය දෙසට නැඹුරුවන්නේ නම් ඔබද ඒ දෙසටම නැඹුරුවන්න. තවද අල්ලාහ් කෙරෙහි ඔබගේ විශ්වාසය තබන්න. නියතවශයෙන්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

وَإِن جَنَحُوا لِلسَّلْمِ فَاجْنَحْ لَهَا وَتَوَكَّلْ عَلَى اللَّهِ ۚ إِنَّهُ هُوَ السَّمِيعُ الْعَلِيمُ ﴿٦٢﴾

63. තවද ඔවුන් ඔබව මුළාකරන්නට අදහස් කරන්නේ නම් නියතවශයෙන්ම ඔබට අල්ලාහ් ප්‍රමාණවත්ය. සිය උපකාරයෙන් සහ විශ්වාසිතයින් මගින් ඔබව ශක්තිමත් කළේ ඔහුමය.

وَإِن يُرِيدُوا أَن يَخْدَعُوكَ فَإِنَّ حَسْبَكَ اللَّهُ ۚ هُوَ الَّذِي أَيَّدَكَ بِنَصْرِهِ وَبِالْمُؤْمِنِينَ ﴿٦٣﴾

64. තවද ඔවුන්ගේ හදවත් අතර සෙනෙහස ඇතිකළේ ඔහුය. පොළොවෙහි ඇති සියළු දේ ඔබ වැය කළද ඔවුන්ගේ හදවත් අතර

وَأَلَّفَ بَيْنَ قُلُوبِهِمْ ۚ لَوْ أَنفَقْتَ مَا فِي الْأَرْضِ جَمِيعًا مَّا أَلَّفْتَ بَيْنَ قُلُوبِهِمْ

وَلٰكِنَّ اللّٰهَ اَلَّفَ بَيْنَهُمْ ۗ اِنَّهٗ عَزِيْزٌ حَكِيْمٌ ﴿٦٤﴾

සෙනෙහස ඇතිකරන්නට ඔබට නුපුළුවන. එහෙත් ඔවුන් අතර සෙනෙහස ඇතිකළේ අල්ලාහ්ය. නියතවශයෙන්ම ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

يٰۤاَيُّهَا النَّبِىُّ حَسْبُكَ اللّٰهُ وَمَنِ اتَّبَعَكَ مِنَ الْمُؤْمِنِيْنَ ﴿٦٥﴾

65. ඕ වක්තෘවරයාණෙනි! ඔබටත්, ඔබව අනුගමනය කරන විශ්වාසිතයින්ටත් අල්ලාහ් ප්‍රමාණවත්ය.

يٰۤاَيُّهَا النَّبِىُّ حَرِّضِ الْمُؤْمِنِيْنَ عَلَى الْقِتَالِ ؕ اِنْ يَّكُنْ مِّنْكُمْ عِشْرُوْنَ صٰبِرُوْنَ يَغْلِبُوْا مِائَتَيْنِ ۚ وَاِنْ يَّكُنْ مِّنْكُمْ مِّائَةٌ يَّغْلِبُوْۤا اَلْفًا مِّنَ الَّذِيْنَ كَفَرُوْا بِاَنَّهُمْ قَوْمٌ لَّا يَفْقَهُوْنَ ﴿٦٦﴾

66. ඕ වක්තෘවරයාණෙනි! විශ්වාසිතයින්ව සටනට උනන්දු කරවන්න. නුඹලා අතුරින් ස්ථිරසාරවන්ත විසිදෙනෙකු සිටිත් නම් ඔවුන් දෙසිය දෙනෙකු අභිබවා යනු ඇත. තවද නුඹලා අතුරින් සියදෙනෙකු සිටිත්නම් ඔවුන් අවිශ්වාසිතයින් දහසක් අභිබවා යනු ඇත. මන්ද ඔවුහු වටහා නොගන්නා ජන පිරිසක් වන බැවිනි.

اَلْـٰٔنَ خَفَّفَ اللّٰهُ عَنْكُمْ وَعَلِمَ اَنَّ فِيْكُمْ ضَعْفًا ؕ فَاِنْ يَّكُنْ مِّنْكُمْ مِّائَةٌ صَابِرَةٌ يَّغْلِبُوْا مِائَتَيْنِ ۚ وَاِنْ يَّكُنْ مِّنْكُمْ اَلْفٌ يَّغْلِبُوْۤا اَلْفَيْنِ بِاِذْنِ اللّٰهِ ؕ وَاللّٰهُ مَعَ الصّٰبِرِيْنَ ﴿٦٧﴾

67. දැනට අල්ලාහ් නුඹලාගෙන් (උසුලන) බර සැහැල්ලු කර ඇත. තවමත් නුඹලා තුළ දුර්වලකම් තිබෙන බව ඔහු දන්නෙහිය. එබැවින් නුඹලා අතුරින් ස්ථිරසාරවන්ත සියදෙනෙකු සිටිත් නම් ඔවුන් දෙසිය දෙනෙකු අභිබවා යනු ඇත. තවද නුඹලා අතුරින් දහසක් සිටිත්නම් ඔවුන් අල්ලාහ්ගේ විධානයෙන් දෙදහසක් අභිබවා යනු ඇත. තවද අල්ලාහ් ස්ථිරසාරවන්තයින් සමඟය.

مَا كَانَ لِنَبِىٍّ اَنْ يَّكُوْنَ لَهٗۤ اَسْرٰى حَتّٰى يُثْخِنَ فِى الْاَرْضِ ؕ تُرِيْدُوْنَ عَرَضَ الدُّنْيَا ۖ وَاللّٰهُ يُرِيْدُ الْاٰخِرَةَ ؕ وَاللّٰهُ عَزِيْزٌ حَكِيْمٌ ﴿٦٨﴾

68. භූමියෙහි නිරන්තර සටනක යෙදෙනතුරු සිරකරුවන් තබාගැනීම වක්තෘවරයෙකුට නොහොබිය. නුඹලා ලෞකික ප්‍රයෝජනයන්ට කැමති වන්නෙහුය. එහෙත් (නුඹලාට) අල්ලාහ් කැමැති වන්නේ මතුලොවය. අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

69. අල්ලාහ් වෙතින් නියමයක් නොතිබෙන්නට නුඹලා පෙර කළ දේ (සම්බන්ධයෙන්) නියතවශයෙන්ම නුඹලාට මහත් විපත්තියක් හසුවන්නට තිබුණි.

لَوْلَا كِتٰبٌ مِّنَ اللّٰهِ سَبَقَ لَمَسَّكُمْ فِيْمَاۤ اَخَذْتُمْ عَذَابٌ عَظِيْمٌ ﴿٦٩﴾

70. එබැවින් නුඹලා (යුද්ධයෙහි) දිනාගත් නිත්‍යානුකූල සහ යහපත් දේ අනුභව කරනු. එමෙන්ම අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

فَكُلُوْا مِمَّا غَنِمْتُمْ حَلٰلًا طَيِّبًا ۖ وَّاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٧٠﴾ ع

71. ඕ වක්තෘවරයාණෙනි! ඔබ අතෙහි (සිරභාරයෙහි) සිටින සිරකරුවන්ට මෙසේ පවසන්න. 'නුඹලාගේ හදවත් තුල යම් යහපතක් අල්ලාහ් දකින්නේ නම් නුඹලාගෙන් ලබාගත් දෙයට වඩා ඉතා හොඳ දෙයක් ඔහු නුඹලාට දෙන්නේය. තවද නුඹලාට ක්ෂමාව දෙන්නේය. තවද අල්ලාහ් අතිශයින් ක්ෂමාන්විතය, පරම දයාබරය.

يٰۤاَيُّهَا النَّبِىُّ قُلْ لِّمَنْ فِىْۤ اَيْدِيْكُمْ مِّنَ الْاَسْرٰٓى ۙ اِنْ يَّعْلَمِ اللّٰهُ فِىْ قُلُوْبِكُمْ خَيْرًا يُّؤْتِكُمْ خَيْرًا مِّمَّاۤ اُخِذَ مِنْكُمْ وَيَغْفِرْ لَكُمْ ؕ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٧١﴾

72. තවද ඔවුන් ඔබගේ විශ්වාසය කඩ කරන්නේ නම් ඔවුන් මීට පෙර අල්ලාහ්ගේ විශ්වාසයද කඩ කර ඇත. එබැවින් ඔහු ඔවුන්ව බෙලහීනත්වයට පමුණුවේය. අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

وَاِنْ يُّرِيْدُوْا خِيَانَتَكَ فَقَدْ خَانُوا اللّٰهَ مِنْ قَبْلُ فَاَمْكَنَ مِنْهُمْ ؕ وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ﴿٧٢﴾

73. නියතවශයෙන්ම විශ්වාස කොට සංක්‍රමණය (හිජ්රත්) කර තම දේපල හා තම දිවියෙන් අල්ලාහ් වෙනුවෙන් මහත් පරිශ්‍රම දැරූ අයද, එමෙන්ම ඔවුනට සෙවණ ලබාදී උපකාර කළ අයද සැබැවින්ම අන්‍යෝන්‍ය මිතුරන් වෙති. එහෙත් විශ්වාස කොට සංක්‍රමණය (හිජ්රත්) නොකළ අය ගත්කළ ඔවුන් සංක්‍රමණය (හිජ්රත්) කරන තෙක් ඔවුන්ගේ ආරක්ෂාව සම්බන්ධයෙන් නුඹලාට කිසි වගකීමක් නැත. එහෙත් ඔවුන් ධර්මය සම්බන්ධව (කරුණු වලදී) නුඹලාගෙන් උපකාරයක් ඉල්ලා සිටියහොත්,

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَهَاجَرُوْا وَجٰهَدُوْا بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ فِىْ سَبِيْلِ اللّٰهِ وَالَّذِيْنَ اٰوَوْا وَّنَصَرُوْۤا اُولٰۤٮِٕكَ بَعْضُهُمْ اَوْلِيَآءُ بَعْضٍ ؕ وَالَّذِيْنَ اٰمَنُوْا وَلَمْ يُهَاجِرُوْا مَا لَكُمْ مِّنْ وَّلَايَتِهِمْ مِّنْ شَىْءٍ حَتّٰى يُهَاجِرُوْا ۚ وَاِنِ اسْتَنْصَرُوْكُمْ فِى

الدِّيْنِ فَعَلَيْكُمُ النَّصْرُ اِلَّا عَلٰى قَوْمٍ
بَيْنَكُمْ وَبَيْنَهُمْ مِّيْثَاقٌ ؕ وَاللّٰهُ بِمَا
تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿٧٣﴾

නුඹලා නුඹලා සමග ගිවිසුමක් ඇති කරගෙන සිටින ජනතාවට විරුද්ධව හැර, ඔවුනට උපකාර කිරීම නුඹලාගේ යුතුකම වේ. තවද නුඹලා කරනදේ අල්ලාහ් දකින්නෙහිය.

وَالَّذِيْنَ كَفَرُوْا بَعْضُهُمْ اَوْلِيَآءُ بَعْضٍ ؕ
اِلَّا تَفْعَلُوْهُ تَكُنْ فِتْنَةٌ فِى الْاَرْضِ
وَفَسَادٌ كَبِيْرٌ ﴿٧٤﴾

74. තවද අවිශ්වාස කරන අය ඔවුන් එකිනෙකාගේ මිතුරන් වෙති. නුඹලා (නුඹලාට ඉගැන් වූ දේ) නොකළහොත් පොළොවෙහි ආරවුල් සහ මහත් කෝලාහල ඇති වේ.

وَالَّذِيْنَ اٰمَنُوْا وَهَاجَرُوْا وَجٰهَدُوْا فِىْ
سَبِيْلِ اللّٰهِ وَالَّذِيْنَ اٰوَوْا وَّ نَصَرُوْۤا
اُولٰٓئِكَ هُمُ الْمُؤْمِنُوْنَ حَقًّا ؕ لَهُمْ
مَّغْفِرَةٌ وَّرِزْقٌ كَرِيْمٌ ﴿٧٥﴾

75. තවද විශ්වාස කොට සංක්‍රමණය (හිජ්රත්) කර අල්ලාහ් වෙනුවෙන් මහත් පරිශ්‍රම දැරූ අය සහ ඔවුනට සෙවණ ලබාදී උපකාර කළ අය යන මොවුන්ම සැබැවින් සත්‍ය විශ්වාසිතයින්ය. ඔවුන්ට ක්ෂමාවද ගෞරවනීය ජීවනෝපායද ඇත.

وَالَّذِيْنَ اٰمَنُوْا مِنْۢ بَعْدُ وَهَاجَرُوْا
وَجٰهَدُوْا مَعَكُمْ فَاُولٰٓئِكَ مِنْكُمْ ؕ
وَاُولُوا الْاَرْحَامِ بَعْضُهُمْ اَوْلٰى بِبَعْضٍ فِىْ
كِتٰبِ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ بِكُلِّ شَىْءٍ عَلِيْمٌ ﴿٧٦﴾

76. තවද ඉන්පසු විශ්වාස කොට සංක්‍රමණය (හිජ්රත්) කර නුඹලා සමග එකතුවී (අල්ලාහ් වෙනුවෙන් මහත් පරිශ්‍රම දැරූ) මොවුන් නුඹලාගෙන්ම අය වන්නෝය. අල්ලාහ්ගේ ග්‍රන්ථයෙහි ලේ ඥාතීන් (ගත්කල) ඔවුන් එකිනෙකාට වඩාත් සමීප අය වෙති. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේ මැනැවින් දන්නෙහිය.



අල් තව්බා
(මදීනාහිදී පහළ වූවකි)

1. (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් නුඹලා ගිවිසුම් ඇතිකරගත් අයගෙන් (සියළු බැඳීම් වලින් සම්පූර්ණයෙන්ම) නිදහස් වන බව (මෙය) අල්ලාහ්ගෙන්ද ඔහුගේ දූතයාගෙන්ද වන ප්‍රකාශයකි.

بَرَآءَةٌ مِّنَ اللّٰهِ وَرَسُوْلِهٖۤ اِلَى الَّذِيْنَ عٰهَدْتُّمْ مِّنَ الْمُشْرِكِيْنَ ﴿١﴾

2. එබැවින් සිව් මසක් භූමියෙහි සැරිසරනු. තවද අල්ලාහ් (ගේ සැලසුම්) නුඹලාට පරාජය කළ නොහැකි බවත් නිසැකවම අල්ලාහ් අවිශ්වාසිතයින්ව අවමානයට ලක් කරන බවත් දැනගනු.

فَسِيْحُوْا فِى الْاَرْضِ اَرْبَعَةَ اَشْهُرٍ وَّاعْلَمُوْۤا اَنَّكُمْ غَيْرُ مُعْجِزِى اللّٰهِ ۙ وَاَنَّ اللّٰهَ مُخْزِى الْكٰفِرِيْنَ ﴿٢﴾

3. තවද (මෙය) අල්ලාහ්ද එමෙන්ම ඔහුගේ දූතයාද (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් නිදහස් වන බවට ශ්‍රේෂ්ඨ (හජ්) වන්දනා දිනයේදී අල්ලාහ් සහ ඔහුගේ දූතයා වෙතින් ජනතාවට කරන්නාවූ ප්‍රසිද්ධ නිවේදනයකි. එහෙයින් නුඹලා පශ්චාත්තාප වන්නේ නම් එය නුඹලාට වඩාත් යහපත්ය. එහෙත් නුඹලා ඉවත හැරෙන්නේ නම් අල්ලාහ් (ගේ සැලසුම්) නුඹලාට පරාජය කළ නොහැකි බව දැනගනු. තවද අවිශ්වාසිතයින්ට වේදනාකාරී දඬුවම ගැන ආරංචිය දෙන්න.

وَاَذَانٌ مِّنَ اللّٰهِ وَرَسُوْلِهٖۤ اِلَى النَّاسِ يَوْمَ الْحَجِّ الْاَكْبَرِ اَنَّ اللّٰهَ بَرِىْٓءٌ مِّنَ الْمُشْرِكِيْنَ ۙ وَرَسُوْلُهٗ ؕ فَاِنْ تُبْتُمْ فَهُوَ خَيْرٌ لَّكُمْ ۚ وَاِنْ تَوَلَّيْتُمْ فَاعْلَمُوْۤا اَنَّكُمْ غَيْرُ مُعْجِزِى اللّٰهِ ؕ وَبَشِّرِ الَّذِيْنَ كَفَرُوْا بِعَذَابٍ اَلِيْمٍ ۙ ﴿٣﴾

4. (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් නුඹලා සමඟ ගිවිසුමකට එළඹ ඇති එමෙන්ම ඔවුන්ගේ යුතුකම් ඉටුකිරීම පැහැර හැර නොමැති එමෙන්ම නුඹලාට විරුද්ධව කිසිවෙකුටත් උදව්ද කර නොමැති අය හැරෙන්නට, ඔවුන් සමඟ (නුඹලා) කර ඇති ගිවිසුම එම කාලය තුළදී ඉටු කරනු. සැබැවින්ම බියබැතිමතුන්ව අල්ලාහ් ප්‍රිය කරන්නේය.

اِلَّا الَّذِيْنَ عٰهَدْتُّمْ مِّنَ الْمُشْرِكِيْنَ ثُمَّ لَمْ يَنْقُصُوْكُمْ شَيْـًٔا وَّلَمْ يُظَاهِرُوْا عَلَيْكُمْ اَحَدًا فَاَتِمُّوْۤا اِلَيْهِمْ عَهْدَهُمْ اِلٰى مُدَّتِهِمْ ؕ اِنَّ اللّٰهَ يُحِبُّ الْمُتَّقِيْنَ ﴿٤﴾

5. ශුද්ධවූ මාසයන් ගෙවී ගිය පසු නුඹලා, (අල්ලාහ්ට) සමාන තබන (ගිවිසුම් කඩකරන)අයව දුටුතැන ඔවුන් සමග සටන් කරනු. තවද ඔවුන්ව අල්ලා (සිරභාරයට) ගනු. ඔවුන්ව වටලනු. පහර දීමට රැක සිටින සෑම තැනකම ඔවුන් වෙනුවෙන් රැඳී සිටිනු. එහෙත් ඔවුන් පශ්චාත්තාපවී නමස්කාරයෙහි යෙදෙන්නේ නම් හා zසකාත් (දුගී බද්ද) ගෙවන්නේ නම් ඔවුනට ඔවුන්ගේ මාර්ගයේ ඉඩ හරිනු. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

فَإِذَا انسَلَخَ الْأَشْهُرُ الْحُرُمُ فَاقْتُلُوا الْمُشْرِكِينَ حَيْثُ وَجَدتُّمُوهُمْ وَخُذُوهُمْ وَاحْصُرُوهُمْ وَاقْعُدُوا لَهُمْ كُلَّ مَرْصَدٍ ۚ فَإِن تَابُوا وَأَقَامُوا الصَّلَوٰةَ وَآتَوُا الزَّكَوٰةَ فَخَلُّوا سَبِيلَهُمْ ۚ إِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ۝٥

6. තවද (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් කවුරුන් හෝ කෙනෙකු ඔබගේ ආරක්ෂාව පතන්නේ නම් ඔහුට ආරක්ෂාව ලබාදෙන්න. එවිට අල්ලාහ්ගේ වදන්වලට සවන්දීම ඔහුට හැකිවේ. පසුව ඔහුගේ ආරක්ෂක ස්ථානය වෙත ඔහුව යොමු කරන්න. ඒ මන්ද යත් ඔවුන් දැනුමක් නැති ජනතාවක් වන බැවිනි.

وَإِنْ أَحَدٌ مِّنَ الْمُشْرِكِينَ اسْتَجَارَكَ فَأَجِرْهُ حَتَّىٰ يَسْمَعَ كَلَٰمَ اللَّهِ ثُمَّ أَبْلِغْهُ مَأْمَنَهُ ۚ ذَٰلِكَ بِأَنَّهُمْ قَوْمٌ لَّا يَعْلَمُونَ ۝٦

7. ශුද්ධ වූ නැමදුම් ස්ථානයේදී නුඹලා සමඟ ගිවිසුම් ඇති කරගත් අය හැරෙන්නට (මෙම) ප්‍රතිමා පුදන්නන්ට අල්ලාහ් සහ ඔහුගේ දූතයා සමඟ ගිවිසුමක් විය හැක්කේ කෙසේද? එබැවින් ඔවුන් නුඹලා සමග ස්ථිරසාරව ක්‍රියා කරන තාක්කල් නුඹලාද ඔවුන් සමග ස්ථිරසාරව ක්‍රියා කරනු. නියතවශයෙන්ම අල්ලාහ් බිය බැතිමතුන්ව ප්‍රිය කරන්නේය.

كَيْفَ يَكُونُ لِلْمُشْرِكِينَ عَهْدٌ عِندَ اللَّهِ وَعِندَ رَسُولِهِۦٓ إِلَّا الَّذِينَ عَٰهَدتُّمْ عِندَ الْمَسْجِدِ الْحَرَامِ ۖ فَمَا اسْتَقَٰمُوا لَكُمْ فَاسْتَقِيمُوا لَهُمْ ۚ إِنَّ اللَّهَ يُحِبُّ الْمُتَّقِينَ ۝٧

8. (එය) කෙසේ (විය හැකි)ද? ඔවුන් නුඹලාට එරෙහිව ජයග්‍රහණය කරන්නේ නම් නුඹලා සමඟ කිසිඳු නෑසබඳතා හා ගිවිසුමෙහි වගකීම නොසලකති. ඔවුන්ගේ හදවත් ප්‍රතික්ෂේප කරන අතරතුර ඔවුන්ගේ මුවින් ඔවුන් නුඹලාව සනසති. තවද ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් ද්‍රෝහීන්ය.

كَيْفَ وَإِن يَظْهَرُوا عَلَيْكُمْ لَا يَرْقُبُوا فِيكُمْ إِلًّا وَلَا ذِمَّةً ۚ يُرْضُونَكُم بِأَفْوَٰهِهِمْ وَتَأْبَىٰ قُلُوبُهُمْ وَأَكْثَرُهُمْ فَٰسِقُونَ ۝٨

9. ඔවුහු අල්ලාහ්ගේ සළකුණු අල්ප මිලකට හුවමාරු කර (මිනිසුන්ව) ඔහුගේ මාර්ගයෙන් වළක්වති. ඔවුන් කරන දේ සත්තකින්ම නපුරුය.

اِشْتَرَوْا بِاٰيٰتِ اللّٰهِ ثَمَنًا قَلِيْلًا فَصَدُّوْا عَنْ سَبِيْلِهٖ ؕ اِنَّهُمْ سَآءَ مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿٩﴾

10. ඔවුන් විශ්වාසිතයෙකු සම්බන්ධයෙන් කිසිදු නෑසබඳතා හා ගිවිසුමෙහි වගකීම නොසලකති. තවද, සීමාව ඉක්මවන්නන් ඔවුහුම වෙති.

لَا يَرْقُبُوْنَ فِیْ مُؤْمِنٍ اِلًّا وَّلَا ذِمَّةً ؕ وَاُولٰٓئِكَ هُمُ الْمُعْتَدُوْنَ ﴿١٠﴾

11. නමුත් ඔවුන් පසුතැවිලි වෙමින් නමස්කාරයෙහි යෙදෙමින් zසකාත් (දුගී බද්ද) ගෙවන්නේ නම් එවිට ඔවුහු ආගමෙහි නුඹලාගේ සහෝදරයන් වෙති. තවද අපි දැනුමැති ජනතාවට සළකුණු පැහැදිලි කරන්නෙමු.

فَاِنْ تَابُوْا وَاَقَامُوا الصَّلٰوةَ وَاٰتَوُا الزَّكٰوةَ فَاِخْوَانُكُمْ فِی الدِّيْنِ ؕ وَنُفَصِّلُ الْاٰيٰتِ لِقَوْمٍ يَّعْلَمُوْنَ ﴿١١﴾

12. තවද ඔවුන්ගේ ගිවිසුමෙන් පසු ඔවුන් සිය ප්‍රතිඥාවන් කඩ කර, නුඹලාගේ ආගමට නින්දා කරන්නේ නම්, ඔවුන් වැළකී සිටිනු පිණිස අවිශ්වාසිත නායකයින් සමග සටන් කරනු. නියතවශයෙන්ම ඔවුනට සිය ප්‍රතිඥාවන් ගැන සැලකිල්ලක් නොමැත.

وَاِنْ نَّكَثُوْۤا اَيْمَانَهُمْ مِّنْۢ بَعْدِ عَهْدِهِمْ وَطَعَنُوْا فِیْ دِيْنِكُمْ فَقَاتِلُوْۤا اَئِمَّةَ الْكُفْرِ ۙ اِنَّهُمْ لَاۤ اَيْمَانَ لَهُمْ لَعَلَّهُمْ يَنْتَهُوْنَ ﴿١٢﴾

13. සිය දිවුරුම් කඩකර ඇති එමෙන්ම දූතයාව පිටමං කිරීමට කුමන්ත්‍රණය කර, නුඹලාට එරෙහිව ප්‍රථමයෙන්ම (එදිරිවාදිකම්) ඇරඹන්නාවූ ජනතාව සමග නුඹලා සටන් නොකරන්නෙහුද? නුඹලා ඔවුන්ට බිය වන්නෙහුද? නොඑසේය, නුඹලා විශ්වාසිතයින් වෙත් නම්, වඩාත් සුදුසු වන්නේ අල්ලාහ් වන ඔහු වෙත නුඹලා බිය දැක්වීමයි.

اَلَا تُقَاتِلُوْنَ قَوْمًا نَّكَثُوْۤا اَيْمَانَهُمْ وَهَمُّوْا بِاِخْرَاجِ الرَّسُوْلِ وَهُمْ بَدَءُوْكُمْ اَوَّلَ مَرَّةٍ ؕ اَتَخْشَوْنَهُمْ ۚ فَاللّٰهُ اَحَقُّ اَنْ تَخْشَوْهُ اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ﴿١٣﴾

14. ඔවුන් සමග සටන් කරනු. මෙමගින් නුඹලාගේ අත්වලින් අල්ලාහ් ඔවුනට දඬුවම් කරන්නේය. තවද ඔවුන්ව නින්දාවට පත් කරන්නේය. තවද ඔවුන් අභිබවා

قَاتِلُوْهُمْ يُعَذِّبْهُمُ اللّٰهُ بِاَيْدِيْكُمْ وَيُخْزِهِمْ وَيَنْصُرْكُمْ عَلَيْهِمْ وَيَشْفِ

صُدُوْرَ قَوْمٍ مُّؤْمِنِيْنَ ﴿١٤﴾

(ජයගැනීමට) නුඹලාට උදව් කරන්නේය. තවද, විශ්වාසිත ජනතාවගේ සිත්වලට සහනය දෙන්නේය.

وَيُذْهِبْ غَيْظَ قُلُوْبِهِمْ ؕ وَيَتُوْبُ اللّٰهُ عَلٰى مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ﴿١٥﴾

15. තවද ඔවුන්ගේ හදවත් තුළ ඇති කෝපය පහ කරන්නේය. තවද අල්ලාහ්, ඔහු කැමති අය වෙත දයාවෙන් යුතුව හැරෙන්නේය. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

اَمْ حَسِبْتُمْ اَنْ تُتْرَكُوْا وَلَمَّا يَعْلَمِ اللّٰهُ الَّذِيْنَ جٰهَدُوْا مِنْكُمْ وَلَمْ يَتَّخِذُوْا مِنْ دُوْنِ اللّٰهِ وَلَا رَسُوْلِهٖ وَلَا الْمُؤْمِنِيْنَ وَلِيْجَةً ؕ وَاللّٰهُ خَبِيْرٌۢ بِمَا تَعْمَلُوْنَ ﴿١٦﴾

16. නුඹලාගෙන් (අල්ලාහ්ගේ මාර්ගයෙහි) පරිශ්‍රමයෙහි යෙදෙන අය කවුරුන්ද යන්නත්, එමෙන්ම අල්ලාහ්ද ඔහුගේ දූතයාද විශ්වාසිතයින්ද හැරෙන්නට (අන්කිසිවෙකුව) සමීප මිතුරෙකු ලෙස නොගන්නා අය කවුරුන්ද යන්නත්, අල්ලාහ් (පිරික්සුමකින් තොරව) හෙළි නොකරන තෙක් නුඹලාව අත්හැර දමනු ලබන්නේ යැයි නුඹලා සිතන්නෙහුද? තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් මැනැවින් විමසිලිමත්ය.

مَا كَانَ لِلْمُشْرِكِيْنَ اَنْ يَّعْمُرُوْا مَسٰجِدَ اللّٰهِ شٰهِدِيْنَ عَلٰۤى اَنْفُسِهِمْ بِالْكُفْرِ ؕ اُولٰٓئِكَ حَبِطَتْ اَعْمَالُهُمْ ۖۚ وَفِى النَّارِ هُمْ خٰلِدُوْنَ ﴿١٧﴾

17. ප්‍රතිමා පුදන්නන් තමන්ටම එරෙහිව අවිශ්වාසයට සාක්ෂි දරන්නන්ව සිටියදී ඔවුන් අල්ලාහ්ගේ නැමදුම් ස්ථානයන් නඩත්තු කිරීම සාධාරණයක් නොවේ. මෙවන් අයගේ ක්‍රියාවන් නිෂ්ඵල වී යන්නේය. තවද ඔවුන් ගින්නෙහි වෙසෙන්නෝය.

اِنَّمَا يَعْمُرُ مَسٰجِدَ اللّٰهِ مَنْ اٰمَنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ وَاَقَامَ الصَّلٰوةَ وَاٰتَى الزَّكٰوةَ وَلَمْ يَخْشَ اِلَّا اللّٰهَ ۫ فَعَسٰۤى اُولٰٓئِكَ اَنْ يَّكُوْنُوْا مِنَ الْمُهْتَدِيْنَ ﴿١٨﴾

18. සත්තකින්ම අල්ලාහ්ගේ නැමදුම් ස්ථානයන් නඩත්තු කිරීමට සුදුස්සා වනුයේ යමෙක් අවසාන දිනය කෙරෙහි විශ්වාස කර, නමස්කාරයෙහි යෙදෙමින්, තවද zසකාත් (දුගී බද්ද) ගෙවමින්, අල්ලාහ් හැරෙන්නට අන් කිසිවෙකුට බිය නොදක්වන ඔහු පමණි. එබැවින් යහමග ලද්දවුන් අතර (සලකනු ලබන්නේ) මොවුහුමය.

اَجَعَلْتُمْ سِقَايَةَ الْحَآجِّ وَعِمَارَةَ الْمَسْجِدِ

19. හජ් වන්දනාකරුවන්ට පැන් සැපයීමත් ශුද්ධවූ නැමදුම් ස්ථානය

الْحَرَامِ كَمَنْ آمَنَ بِاللَّهِ وَالْيَوْمِ الْآخِرِ وَجَاهَدَ فِي سَبِيلِ اللَّهِ ۚ لَا يَسْتَوُونَ عِنْدَ اللَّهِ ۗ وَاللَّهُ لَا يَهْدِي الْقَوْمَ الظَّالِمِينَ ﴿١٩﴾

නඩත්තු කිරීමත්, අල්ලාහ් සහ අවසන් දිනය කෙරෙහි විශ්වාස කරන මෙන්ම අල්ලාහ්ගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදෙන අය (ගේ ක්‍රියා) එක සමාන ලෙස නුඹලා සිතන්නෙහුද? අල්ලාහ්ගේ දැක්මෙහි ඔවුහු (කිසිසේත්ම) එක සමාන නොවෙති. තවද අයුක්තිගරුක ජනතාවට අල්ලාහ් මග නොපෙන්වයි.

الَّذِينَ آمَنُوا وَهَاجَرُوا وَجَاهَدُوا فِي سَبِيلِ اللَّهِ بِأَمْوَالِهِمْ وَأَنْفُسِهِمْ أَعْظَمُ دَرَجَةً عِنْدَ اللَّهِ ۚ وَأُولَٰئِكَ هُمُ الْفَائِزُونَ ﴿٢٠﴾

20. කවුරුන් හෝ විශ්වාස කර (දෙවියන් වෙනුවෙන් සිය නිවෙස්වලින්) සංක්‍රමණය කරමින් තවද සිය වස්තූන් සහ සිය ජීවිතයන් මගින් අල්ලාහ්ගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදෙන්නේද, (ඔවුනට) අල්ලාහ්ගේ දැක්මෙහි උසස් තරාතිරමක් ඇත. තවද ඔවුහුම ජය ලබන්නන් වෙති.

يُبَشِّرُهُمْ رَبُّهُمْ بِرَحْمَةٍ مِنْهُ وَرِضْوَانٍ وَجَنَّاتٍ لَهُمْ فِيهَا نَعِيمٌ مُقِيمٌ ﴿٢١﴾

21. ඔවුන්ගේ අධිපතියාණන් ඔවුනට ඔහු වෙතින් දයාවද (ඔහුගේ) තෘප්තියද ඔවුන් වෙනුවෙන් සදාකාලික සෞභාග්‍ය සහිත උද්‍යානයන් ගැනද ශුභාරංචි දෙන්නේය.

خَالِدِينَ فِيهَا أَبَدًا ۚ إِنَّ اللَّهَ عِنْدَهُ أَجْرٌ عَظِيمٌ ﴿٢٢﴾

22. ඔවුහු සදාකාලිකව එහිම වෙසෙන්නෝය. සැබැවින්ම අති මහත්වූ තිළිණය අල්ලාහ් වෙතය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَتَّخِذُوا آبَاءَكُمْ وَإِخْوَانَكُمْ أَوْلِيَاءَ إِنِ اسْتَحَبُّوا الْكُفْرَ عَلَى الْإِيمَانِ ۚ وَمَنْ يَتَوَلَّهُمْ مِنْكُمْ فَأُولَٰئِكَ هُمُ الظَّالِمُونَ ﴿٢٣﴾

23. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේ පියවරුන් සහ සොහොයුරන්ව, ඔවුන් විශ්වාසයට වඩා අවිශ්වාසය ප්‍රිය කරන්නේ නම් මිතුරන් සේ නොගනු. තවද නුඹලා අතුරින් කවුරුන් හෝ ඔවුන්ව මිතුරන් කරගන්නේ නම් වරදකරුවන් වන්නේ ඔවුන්මය.

قُلْ إِنْ كَانَ آبَاؤُكُمْ وَأَبْنَاؤُكُمْ وَإِخْوَانُكُمْ وَأَزْوَاجُكُمْ وَعَشِيرَتُكُمْ

24. පවසන්න! නුඹලාගේ පියවරුන්ද, නුඹලාගේ පුතුන්ද, නුඹලාගේ සොහොයුරන්ද, නුඹලාගේ බිරියන්ද, නුඹලාගේ නෑයන්ද, නුඹලා උපයා ඇති ධනයද, පාඩුවිය

وَاَمْوَالُ ۨاقْتَرَفْتُمُوْهَا وَتِجَارَةٌ تَخْشَوْنَ
كَسَادَهَا وَمَسٰكِنُ تَرْضَوْنَهَاۤ اَحَبَّ
اِلَيْكُمْ مِّنَ اللّٰهِ وَرَسُوْلِهٖ وَجِهَادٍ فِىْ
سَبِيْلِهٖ فَتَرَبَّصُوْا حَتّٰى يَاْتِىَ اللّٰهُ بِاَمْرِهٖ ؕ
وَاللّٰهُ لَا يَهْدِى الْقَوْمَ الْفٰسِقِيْنَ ﴿۲۴﴾

හැකියැයි නුඹලා බියවන වෙළඳාමද, නුඹලා ප්‍රිය කරන වාසස්ථානයන්ද, අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන්ටත්, ඔහුගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදීමටත් වඩා නුඹලාට වැඩි කැමැත්තක් වන්නේ නම්, එවිට අල්ලාහ්, සිය තීන්දුව ගෙන එනතෙක් බලා සිටිනු. තවද අල්ලාහ් අකීකරු ජනතාවට මග නොපෙන්වයි.

لَقَدْ نَصَرَكُمُ اللّٰهُ فِىْ مَوَاطِنَ كَثِيْرَةٍ ۙ
وَّيَوْمَ حُنَيْنٍ ۙ اِذْ اَعْجَبَتْكُمْ كَثْرَتُكُمْ
فَلَمْ تُغْنِ عَنْكُمْ شَيْـًٔا وَّضَاقَتْ عَلَيْكُمُ
الْاَرْضُ بِمَا رَحُبَتْ ثُمَّ وَلَّيْتُمْ
مُّدْبِرِيْنَ ﴿۲۵﴾

25. නියතවශයෙන්ම අල්ලාහ් බොහෝ යුධබිම්හි නුඹලාට උදව්කර ඇත්තේය. තවද හුනෛන් (යුධ) දිනයේදී නුඹලාගේ බහුතරය නුඹලාව උඩඟුභාවයට පත්කළ විට එය නුඹලාට කිසිඳු ඵලක් නොවීය. තවද භූමිය විශාල වුවද එය නුඹලාට පටුවිය. අනතුරුව නුඹලා පිටුපාමින් පසුබට වූවෙහුය.

ثُمَّ اَنْزَلَ اللّٰهُ سَكِيْنَتَهٗ عَلٰى رَسُوْلِهٖ
وَعَلَى الْمُؤْمِنِيْنَ وَاَنْزَلَ جُنُوْدًا لَّمْ
تَرَوْهَا وَعَذَّبَ الَّذِيْنَ كَفَرُوْا ؕ وَذٰلِكَ
جَزَآءُ الْكٰفِرِيْنَ ﴿۲۶﴾

26. පසුව අල්ලාහ්, ඔහුගේ දූතයාණන් කෙරෙහිද, විශ්වාසිතයින් කෙරෙහිද, ශාන්තභාවය පහළ වීමට සැලැස්වූයේය. තවද නුඹලා නොදුටු සේනාවන්ද පහළ කරමින් අවිශ්වාසිතයින්ට ඔහු දඬුවම් දුන්නේය. තවද අවිශ්වාසිතයින්ට ඵලවිපාකය මෙයම වේ.

ثُمَّ يَتُوْبُ اللّٰهُ مِنْ ۢ بَعْدِ ذٰلِكَ عَلٰى مَنْ
يَّشَآءُ ؕ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿۲۷﴾

27. අනතුරුව අල්ලාහ් එයට පසුවත් ඔහු අභිමත අයකෙරෙහි (කරුණාවෙන් යුතුව) හැරෙන්නේය. එමෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِنَّمَا الْمُشْرِكُوْنَ
نَجَسٌ فَلَا يَقْرَبُوا الْمَسْجِدَ الْحَرَامَ بَعْدَ

28. එම්බල විශ්වාසිතයිනි! ඇත්තෙන්ම අල්ලාහ්ට සමාන තබන්නන් අපවිත්‍රය. එබැවින් ඔවුන් තමන්ගේ මෙම වසරට පසු ශුද්ධ වූ

عَامِهِمْ هَٰذَا ۚ وَإِنْ خِفْتُمْ عَيْلَةً فَسَوْفَ يُغْنِيكُمُ اللَّهُ مِن فَضْلِهِ إِن شَاءَ ۚ إِنَّ اللَّهَ عَلِيمٌ حَكِيمٌ ٢٨

නැමදුම් ස්ථානයට ලං නොවිය යුතුය. නුඹලා දිළිඳුකමට බිය වන්නෙහු නම්, අල්ලාහ් කැමති වුවහොත් ඔහු තම සෞභාග්‍යයෙන් නුඹලාව පොහොසත් කරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥා සම්පන්නය.

قَاتِلُوا الَّذِينَ لَا يُؤْمِنُونَ بِاللَّهِ وَلَا بِالْيَوْمِ الْآخِرِ وَلَا يُحَرِّمُونَ مَا حَرَّمَ اللَّهُ وَرَسُولُهُ وَلَا يَدِينُونَ دِينَ الْحَقِّ مِنَ الَّذِينَ أُوتُوا الْكِتَابَ حَتَّىٰ يُعْطُوا الْجِزْيَةَ عَن يَدٍ وَهُمْ صَاغِرُونَ ٢٩

29. අල්ලාහ් කෙරෙහිත්, අවසන් දිනය කෙරෙහිත් විශ්වාස නොකොට, අල්ලාහ් මෙන්ම ඔහුගේ දූතයාණන් තහනම් කළදේ තහනම් යැයි නොසළකමින්, සත්‍යවූ ආගම නොපිළිපදිමින් සිටින පුස්තකය දෙනලද ජනයාගෙන් ඔවුන් (යටහත්ව තමන්ගේ) අතින් බද්ද ගෙවා, ඔවුන්ගේ යටහත්වීම පිළිගන්නාතුරු ඔවුන් සමඟ සටන්කරනු.

وَقَالَتِ الْيَهُودُ عُزَيْرٌ ابْنُ اللَّهِ وَقَالَتِ النَّصَارَى الْمَسِيحُ ابْنُ اللَّهِ ۖ ذَٰلِكَ قَوْلُهُم بِأَفْوَاهِهِمْ ۖ يُضَاهِئُونَ قَوْلَ الَّذِينَ كَفَرُوا مِن قَبْلُ ۚ قَاتَلَهُمُ اللَّهُ ۚ أَنَّىٰ يُؤْفَكُونَ ٣٠

30. තවද උzසයිර්, අල්ලාහ්ගේ පුත්‍රයා යැයි යුදෙව්වරු කියති. එමෙන්ම මෙසායා, අල්ලාහ්ගේ පුත්‍රයා යැයි කිතුනුවරු කියති. මෙය ඔවුන්ගේ මුවින් පිටවන වදනක් හැර අන්කිසිවක් නොවේ. ඔවුනට පෙරවූ අවිශ්වාස කළවුන්ගේ වැකිය ඔවුහු අනුකරණය කරති. අල්ලාහ්ගේ ශාපය ඔවුන්මත වේවා! ඔවුන් කෙසේ හරවනු ලබන්නේද?

اتَّخَذُوا أَحْبَارَهُمْ وَرُهْبَانَهُمْ أَرْبَابًا مِّن دُونِ اللَّهِ وَالْمَسِيحَ ابْنَ مَرْيَمَ وَمَا أُمِرُوا إِلَّا لِيَعْبُدُوا إِلَٰهًا وَاحِدًا ۖ لَّا إِلَٰهَ إِلَّا هُوَ ۚ سُبْحَانَهُ عَمَّا يُشْرِكُونَ ٣١

31. ඔවුන් අල්ලාහ් වෙනුවට ඔවුන්ගේ උගතුන්වද, ඔවුන්ගේ පූජකයින්වද, අධිපතිවරුන් ලෙස ගත්හ. තවද (මෙලෙසම) මරියම්ගේ පුත් මෙසායාවද (ගත්හ). තවද ඔවුන්ට එකම දෙවියෙකුව නැමදීම හැර අන්කිසිවක් අණ නොකරන ලදි. නැමදීමට සුදුස්සා ඔහු හැර අන්කිසිවෙක් නොමැත. ඔවුන් (ඔහුට) සමාන තබන දෙයට වඩා ඔහු අති පරිශුද්ධය.

32. අල්ලාහ්ගේ ආලෝකය ඔවුහු තමන්ගේ මුවින් නිවා දමන්නට කැමති වන්නෝය. අවිශ්වාසීතයින් කෙතරම් අකමැති වුවද අල්ලාහ්, ඔහුගේ ආලෝකය පරිපූර්ණ කිරීම හැරෙන්නට අන් දෙයට ඔහු අවසර නොදෙන්නේය.

يُرِيدُونَ أَن يُطْفِـُٔوا۟ نُورَ ٱللَّهِ بِأَفْوَٰهِهِمْ وَيَأْبَى ٱللَّهُ إِلَّآ أَن يُتِمَّ نُورَهُۥ وَلَوْ كَرِهَ ٱلْكَـٰفِرُونَ ﴿٣٢﴾

33. අල්ලාහ්ට සමාන තබන්නන් කෙතරම් අකැමති වුවද සෙසු සැම ආගමකටම වඩා අභිබවා යෑම පිණිස මග පෙන්වීම සහ සත්‍ය ආගම සමග තම දූතයාණන්ව යැව්වේ ඔහුමය.

هُوَ ٱلَّذِىٓ أَرْسَلَ رَسُولَهُۥ بِٱلْهُدَىٰ وَدِينِ ٱلْحَقِّ لِيُظْهِرَهُۥ عَلَى ٱلدِّينِ كُلِّهِۦ وَلَوْ كَرِهَ ٱلْمُشْرِكُونَ ﴿٣٣﴾

34. එම්බල විශ්වාසීතයිනි! නියතවශයෙන්ම පූජකයින් හා පැවිද්දන්ගෙන් බොහෝ අය වැරදි මාර්ගයන් මගින් මිනිසුන්ගේ ධනය ගිල දමමින් අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වති. තවද රන් සහ රිදී රැස් කරගෙන අල්ලාහ්ගේ මාර්ගයෙහි එය වැය නොකරන අයට වේදනාකාරී දඬුවම පිළිබඳ වූ ආරංචි දෙන්න.

يَـٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوٓا۟ إِنَّ كَثِيرًا مِّنَ ٱلْأَحْبَارِ وَٱلرُّهْبَانِ لَيَأْكُلُونَ أَمْوَٰلَ ٱلنَّاسِ بِٱلْبَـٰطِلِ وَيَصُدُّونَ عَن سَبِيلِ ٱللَّهِ ۗ وَٱلَّذِينَ يَكْنِزُونَ ٱلذَّهَبَ وَٱلْفِضَّةَ وَلَا يُنفِقُونَهَا فِى سَبِيلِ ٱللَّهِ فَبَشِّرْهُم بِعَذَابٍ أَلِيمٍ ﴿٣٤﴾

35. නිරා ගින්නෙහි ගිනියම් විමට සලස්වනු ලබන්නාවූ එමගින් ඔවුන්ගේ නළලයන් සහ ඔවුන්ගේ ඇළපත් සහ ඔවුන්ගේ පිට හංවඩු ගසනු ලබන්නාවූ එම දිනයේදී (ඔවුනට මෙසේ කියනු ලැබේ). 'මෙය නුඹලා විසින් නුඹලා සඳහාම එක්රැස් කරගත් දේය. එබැවින් දැන් නුඹලා එක්රැස් කරගත් දේ විඳිනු'.

يَوْمَ يُحْمَىٰ عَلَيْهَا فِى نَارِ جَهَنَّمَ فَتُكْوَىٰ بِهَا جِبَاهُهُمْ وَجُنُوبُهُمْ وَظُهُورُهُمْ ۖ هَـٰذَا مَا كَنَزْتُمْ لِأَنفُسِكُمْ فَذُوقُوا۟ مَا كُنتُمْ تَكْنِزُونَ ﴿٣٥﴾

36. අල්ලාහ් නියම කළ නීති මාලාව අනුව, ඔහු අහස්ද පොළොවද නිර්මාණය කළ දිනයේ සිට මාසයන්ගේ ගණන අල්ලාහ් ඉදිරියේ දොළොස් මාසයන් වේ.

إِنَّ عِدَّةَ ٱلشُّهُورِ عِندَ ٱللَّهِ ٱثْنَا عَشَرَ شَهْرًا فِى كِتَـٰبِ ٱللَّهِ يَوْمَ خَلَقَ ٱلسَّمَـٰوَٰتِ

وَالْاَرْضَ مِنْهَآ اَرْبَعَةٌ حُرُمٌ ؕ ذٰلِكَ
الدِّيْنُ الْقَيِّمُ ۙ۬ فَلَا تَظْلِمُوْا فِيْهِنَّ
اَنْفُسَكُمْ وَقَاتِلُوا الْمُشْرِكِيْنَ كَآفَّةً
كَمَا يُقَاتِلُوْنَكُمْ كَآفَّةً ؕ وَاعْلَمُوْۤا اَنَّ
اللّٰهَ مَعَ الْمُتَّقِيْنَ ۝٣٦

මේවායෙන් සතරක් පරිශුද්ධය. මෙය ස්ථිරව පවතින්නාවූ ආගමකි. එහෙයින් ඒවාහි තමන්ටම වැරදි කර නොගනු. තවද (සමාන තබන්නන් වන) ඔවුන් එක්ව් නුඹලා සමග සටන් කරන සේ නුඹලාද එක්ව් සමාන තබන්නන් සමග සටන් කරනු. තවද අල්ලාහ් බිය බැතිමතුන් සමඟ බව දැනගනු.

اِنَّمَا النَّسِيْٓءُ زِيَادَةٌ فِى الْكُفْرِ يُضَلُّ
بِهِ الَّذِيْنَ كَفَرُوْا يُحِلُّوْنَهٗ عَامًا
وَّيُحَرِّمُوْنَهٗ عَامًا لِّيُوَاطِـُٔوْا عِدَّةَ مَا
حَرَّمَ اللّٰهُ فَيُحِلُّوْا مَا حَرَّمَ اللّٰهُ ؕ زُيِّنَ
لَهُمْ سُوْٓءُ اَعْمَالِهِمْ ؕ وَاللّٰهُ لَا يَهْدِى
الْقَوْمَ الْكٰفِرِيْنَ ۝٣٧ ع

37. නියතවශයෙන්ම (ශුද්ධවූ මාසයක්) කල්දැමීම අවිශ්වාස කමට එකතුවීමකි. මෙමගින් අවිශ්වාසීහු නොමග යවනු ලබන්නාහුය. අල්ලාහ් පරිශුද්ධ බවට පත්කර ඇති (මාස) ගණනයට ඔවුන් එකඟවනු පිණිස ඔවුහු එක් අවුරුද්දකට එය අනුමත කරන අතර අනෙක් අවුරුද්දට එය තහනම් කරති. තවද මේ ආකාරයට අල්ලාහ් තහනම් කර ඇති දේ අනුමත කර ගනිති. ඔවුන්ගේ ක්‍රියාවන්හි පාපකාරී බව ඔවුන්ට අලංකාර ලෙස (පෙනියාමට) සලස්වන ලදී. තවද අවිශ්වාසිත ජනයාට අල්ලාහ් මග නොපෙන්වයි.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا مَا لَكُمْ اِذَا قِيْلَ لَكُمُ
انْفِرُوْا فِىْ سَبِيْلِ اللّٰهِ اثَّاقَلْتُمْ اِلَى
الْاَرْضِ ؕ اَرَضِيْتُمْ بِالْحَيٰوةِ الدُّنْيَا مِنَ
الْاٰخِرَةِ ۚ فَمَا مَتَاعُ الْحَيٰوةِ الدُّنْيَا فِى
الْاٰخِرَةِ اِلَّا قَلِيْلٌ ۝٣٨

38. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ගේ මාර්ගයෙහි ඉදිරියට යනුයි නුඹලාට කියනු ලැබූ කල්හි නුඹලා පොළොව දෙසට බරව නැඹුරුවී සිටින්නට නුඹලාට කුමක් සිදුවී ඇත්ද? පරලොවට වඩා මෙලොව ජීවිතය ගැන නුඹලා තෘප්තිමත් වන්නෙහුද? මෙලොව ජීවිතයෙහි ඉපැයුම පරලොවෙහිදි ඉතා සුළු සහ නොවැදගත් ලෙස පෙනේ.

اِلَّا تَنْفِرُوْا يُعَذِّبْكُمْ عَذَابًا اَلِيْمًا ۙ۬
وَّيَسْتَبْدِلْ قَوْمًا غَيْرَكُمْ وَلَا تَضُرُّوْهُ

39. නුඹලා (සටන් කිරීමට) ඉදිරියට නොයන්නේ නම්, ඔහු වේදනාකාරී දඬුවමින් නුඹලාට දඬුවම් කරන්නේය. එමෙන්ම නුඹලා

شَيْـًٔا ۗ وَاللّٰهُ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ۝٣٩

වෙනුවට වෙනත් ජනතාවක් තෝරා පත්කර ගන්නේය. තවද නුඹලාට කිසිසේත්ම ඔහුට හානියක් කරන්නට නොහැකිය. තවද අල්ලාහ් සියළුදේ කෙරෙහි අති බලසම්පන්නය.

اِلَّا تَنْصُرُوْهُ فَقَدْ نَصَرَهُ اللّٰهُ اِذْ اَخْرَجَهُ الَّذِيْنَ كَفَرُوْا ثَانِيَ اثْنَيْنِ اِذْ هُمَا فِى الْغَارِ اِذْ يَقُوْلُ لِصَاحِبِهٖ لَا تَحْزَنْ اِنَّ اللّٰهَ مَعَنَا ۚ فَاَنْزَلَ اللّٰهُ سَكِيْنَتَهٗ عَلَيْهِ وَاَيَّدَهٗ بِجُنُوْدٍ لَّمْ تَرَوْهَا وَجَعَلَ كَلِمَةَ الَّذِيْنَ كَفَرُوا السُّفْلٰى ۗ وَكَلِمَةُ اللّٰهِ هِىَ الْعُلْيَا ۗ وَاللّٰهُ عَزِيْزٌ حَكِيْمٌ ۝٤٠

40. නුඹලා මොහුට (දූතයාණන්ට) උදව් නොකරන්නේ නම්, දෙදෙනාගෙන් කෙනෙකු ලෙස සිටියදී අවිශ්වාසිතයින් මොහුව පිටුවහල් කළ කල්හිද, ඒ දෙදෙනා ගුහාවෙහි වූ විට මොහු තමාගේ සගයාට 'කණගාටු නොවන්න. ඇත්තෙන්ම අල්ලාහ් අප සමඟයැ'යි කියූ අවස්ථාවේදී(ත්) අල්ලාහ් මොහුට උදව් කළ බව (දැනගනු). අනතුරුව අල්ලාහ් මොහු කෙරෙහි ඔහුගේ සැනසුම පහළ කර නුඹලා නොදුටු සේනාවන් මගින් මොහුව ශක්තිමත් කර අවිශ්වාසිතයින්ගේ වදන අවමානයට පත් කළේය. තවද අල්ලාහ්ගේ වදන අති උතුම්ය. එමෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

اِنْفِرُوْا خِفَافًا وَّ ثِقَالًا وَّ جَاهِدُوْا بِاَمْوَالِكُمْ وَاَنْفُسِكُمْ فِىْ سَبِيْلِ اللّٰهِ ؕ ذٰلِكُمْ خَيْرٌ لَّكُمْ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ۝٤١

41. නුඹලා සැහැල්ලුවුවද, බරවුවද, ඉදිරියට යනු. තවද නුඹලාගේ වස්තූන් මෙන්ම නුඹලාගේ ප්‍රාණයන් මගින් අල්ලාහ්ගේ මාර්ගයේ පරිශ්‍රමයෙහි යෙදෙනු. නුඹලා දැනසිටියෙහු නම් මෙය නුඹලාට වඩාත් යහපත්ය.

لَوْ كَانَ عَرَضًا قَرِيْبًا وَّسَفَرًا قَاصِدًا لَّاتَّبَعُوْكَ وَلٰكِنْۢ بَعُدَتْ عَلَيْهِمُ الشُّقَّةُ ؕ وَسَيَحْلِفُوْنَ بِاللّٰهِ لَوِ اسْتَطَعْنَا لَخَرَجْنَا مَعَكُمْ ۚ يُهْلِكُوْنَ اَنْفُسَهُمْ ۚ وَاللّٰهُ يَعْلَمُ اِنَّهُمْ لَكٰذِبُوْنَ ۝٤٢

42. එය, ඉක්මන් ප්‍රයෝජනයක් හෝ කෙටි ගමනක් හෝ වූයේ නම් නියතවශයෙන්ම ඔවුහු ඔබව අනුගමනය කරන්නට තිබුණි. එහෙත් දුෂ්කර ගමන ඔවුනට ඉතාදුර ලෙස පෙනුණි. එසේ වුවද ඔවුහු 'අපට හැකියාව තිබුණි නම්, නියතවශයෙන්ම අපටද ඔබ සමඟ ඉදිරියට යන්නට තිබුණි'යි (පවසමින්) සත්තකින්ම අල්ලාහ් මත දිවුරන්නෝය. ඔවුන් තමන්ගේම ආත්මයන් විනාශ කර ගනිති. තවද ඔවුන් බොරුකාරයන් බව අල්ලාහ් දනියි.

43. අල්ලාහ් ඔබගේ (දුෂ්කරතාවයන්) දුරු කරත්වා. සත්‍යය පැවසූ අය කවුරුන්දැයි ඔබට ප්‍රත්‍යක්ෂ වී, බොරු පවසන්නන්ව ඔබ දැනගන්නා තුරු ඔබ ඔවුනට (පසුපස රැඳී සිටීමට) අනුමැතිය ලබා දුන්නේ මක්නිසාද?

عَفَا اللّٰهُ عَنْكَ ۚ لِمَ اَذِنْتَ لَهُمْ حَتّٰى يَتَبَيَّنَ لَكَ الَّذِيْنَ صَدَقُوْا وَتَعْلَمَ الْكٰذِبِيْنَ ﴿٤٣﴾

44. අල්ලාහ් කෙරෙහිද, අවසාන දිනය කෙරෙහිද, විශ්වාස කරන අය තමන්ගේ වස්තූන් මෙන්ම තමන්ගේ ප්‍රාණයන් මගින් පරිශ්‍රමය දැරීමෙන් (නිදහස් වන්නට) ඔබගෙන් අවසර නොඉල්ලති. එමෙන්ම අල්ලාහ් බිය බැතිමතුන්ව මැනැවින් දනී.

لَا يَسْتَاْذِنُكَ الَّذِيْنَ يُؤْمِنُوْنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ اَنْ يُّجَاهِدُوْا بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ ؕ وَاللّٰهُ عَلِيْمٌۢ بِالْمُتَّقِيْنَ ﴿٤٤﴾

45. අල්ලාහ් කෙරෙහිද, අවසාන දිනය කෙරෙහිද, විශ්වාස නොකරන සහ සිය හදවත් සැකයෙන් පිරී ඇති එමෙන්ම සිය සැකය නිසා දෙගිඩියාවෙන් පසුවන අය පමණක් (නිදහස් වීමට) ඔබගේ අවසරය ඉල්ලන්නෝය.

اِنَّمَا يَسْتَاْذِنُكَ الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ وَارْتَابَتْ قُلُوْبُهُمْ فَهُمْ فِيْ رَيْبِهِمْ يَتَرَدَّدُوْنَ ﴿٤٥﴾

46. තවද ඔවුන් ඉදිරියට යාමට අදිටන් කළේ නම්, නියතවශයෙන්ම ඔවුන් ඒ සඳහා යම් සූදානමක් කරන්නට තිබුණි. එහෙත් ඔවුන්ගේ ඉදිරියට යෑම අල්ලාහ් අකමැති වූයේය. එබැවින් ඔහු ඔවුන්ව රඳවා තැබුවේය. 'සිටින්නවුන් සමඟ නුඹලා (නිවසෙහි) සිටිනු' යි කියන ලදී.

وَلَوْ اَرَادُوا الْخُرُوْجَ لَاَعَدُّوْا لَهٗ عُدَّةً وَّلٰكِنْ كَرِهَ اللّٰهُ انْۢبِعَاثَهُمْ فَثَبَّطَهُمْ وَقِيْلَ اقْعُدُوْا مَعَ الْقٰعِدِيْنَ ﴿٤٦﴾

47. ඔවුන් නුඹලා සමග ඉදිරියට ගියේ නම් ඔවුන් නුඹලාට හිරිහැරයක් හැරෙන්නට අන් කිසිවක් වැඩි කරන්නට නොතිබුණි. තවද නුඹලා අතර භේද (ඇති)කිරීමේ අදහසින් ඔවුන් යුහුසුළුව නුඹලා අතර ඔබ මොබ සැරිසරන්නට තිබුණි. තවද ඔවුන්ට ඇහුම්කන් දීමට ලැදි අයද නුඹලා අතර සිටිති. තවද වැරදිකරන්නන්ව අල්ලාහ් මැනැවින් දනියි.

لَوْ خَرَجُوْا فِيْكُمْ مَّا زَادُوْكُمْ اِلَّا خَبَالًا وَّلَاۡاَوْضَعُوْا خِلٰلَكُمْ يَبْغُوْنَكُمُ الْفِتْنَةَ ۚ وَفِيْكُمْ سَمّٰعُوْنَ لَهُمْ ؕ وَاللّٰهُ عَلِيْمٌۢ بِالظّٰلِمِيْنَ ﴿٤٧﴾

48. (මීට) පෙරද ඔවුහු කලබල

لَقَدِ ابْتَغَوُا الْفِتْنَةَ مِنْ قَبْلُ وَقَلَّبُوْا لَكَ

(ඇති) කරන්නට තැත් කළහ. ඔවුන් (එයට) අකමැති වුවද සත්‍ය පැමිණ අල්ලාහ්ගේ අරමුණ ප්‍රත්‍යක්ෂ වනතුරු ඔවුන් ඔබට විරුද්ධව උපක්‍රමයන් කළහ.

الْاُمُوْرَ حَتّٰى جَآءَ الْحَقُّ وَظَهَرَ اَمْرُ اللّٰهِ وَهُمْ كٰرِهُوْنَ ﴿٤٨﴾

49. තවද '(පසුපස රැඳී සිටින්නට) මට අවසර දෙන්න. තවද මා පිරික්සුමට ලක් නොකරන්නැ' යි කියන ඇතැම් අය ඔවුන් අතර සිටිති. නියතවශයෙන්ම දැනටමත් ඔවුන් පිරික්සුමට භාජනය වී ඇත. තවද නියතවශයෙන්ම නිරය අවිශ්වාසීතයින්ව වටලාගන්නේය.

وَمِنْهُمْ مَّنْ يَّقُوْلُ ائْذَنْ لِّيْ وَلَا تَفْتِنِّيْ ؕ اَلَا فِى الْفِتْنَةِ سَقَطُوْا ؕ وَاِنَّ جَهَنَّمَ لَمُحِيْطَةٌ ۢ بِالْكٰفِرِيْنَ ﴿٤٩﴾

50. ඔබට යහපතක් අත්වුවා නම් එය ඔවුන්ව කනස්සල්ලට පත්කරන්නේය. එහෙත් ඔබට විපතක් අත්වුවා නම් 'ඇත්තෙන්ම අප කල්තියාම ආරක්ෂාකාරී පියවර ගෙන ඇතැ'යි ඔවුහු කියති. එමෙන්ම ඔවුහු සන්තෝශයෙන් යුතුව හැරී යන්නෙහුය.

اِنْ تُصِبْكَ حَسَنَةٌ تَسُؤْهُمْ ۚ وَاِنْ تُصِبْكَ مُصِيْبَةٌ يَّقُوْلُوْا قَدْ اَخَذْنَاۤ اَمْرَنَا مِنْ قَبْلُ وَيَتَوَلَّوْا وَّهُمْ فَرِحُوْنَ ﴿٥٠﴾

51. 'අල්ලාහ් අප සඳහා නියම කර ඇති දේ හැරෙන්නට අන් කිසිවක් අපට අත් නොවන්නේය. ඔහු අපගේ ආරක්ෂකයාය. එබැවින් විශ්වාසීතයින් අල්ලාහ් කෙරෙහි ඔවුන්ගේ විශ්වාසය තැබිය යුතු වේ.' යැයි පවසන්න.

قُلْ لَّنْ يُّصِيْبَنَاۤ اِلَّا مَا كَتَبَ اللّٰهُ لَنَا ۚ هُوَ مَوْلٰٮنَا ۚ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ﴿٥١﴾

52. පවසන්න, 'යහපත් දේවල් දෙකකින් එකක් හැරෙන්නට කිසියම් දෙයක් අප වෙනුවෙන් නුඹලා අපේක්ෂා නොකරන්නෙහුය. එහෙත් නුඹලා සම්බන්ධයෙන් අල්ලාහ්, ඔහු වෙතින් නැත්නම් අපගේ අත්වලින් නුඹලාට දඬුවම් කරන්නේයැයි අපි අපේක්ෂා කරමු. එබැවින් බලා සිටිනු. නුඹලා සමඟ අපි(ද) බලා සිටින්නෙමු'.

قُلْ هَلْ تَرَبَّصُوْنَ بِنَاۤ اِلَّاۤ اِحْدَى الْحُسْنَيَيْنِ ؕ وَنَحْنُ نَتَرَبَّصُ بِكُمْ اَنْ يُّصِيْبَكُمُ اللّٰهُ بِعَذَابٍ مِّنْ عِنْدِهٖۤ اَوْ بِاَيْدِيْنَا ۖ فَتَرَبَّصُوْۤا اِنَّا مَعَكُمْ مُّتَرَبِّصُوْنَ ﴿٥٢﴾

53. පවසන්න, 'නුඹලා කැමැත්තෙන් හෝ අකමැත්තෙන් වැය

قُلْ اَنْفِقُوْا طَوْعًا اَوْ كَرْهًا لَّنْ يُّتَقَبَّلَ

مِنْكُمْ ۖ اِنَّكُمْ كُنْتُمْ قَوْمًا فٰسِقِيْنَ ﴿٥٣﴾

කලද, එය නුඹලාගෙන් භාරගනු නොලබන්නේමය. ඇත්තෙන්ම නුඹලා අවනත නොවන ජනතාවක් වන්නෙහුය'.

وَمَا مَنَعَهُمْ اَنْ تُقْبَلَ مِنْهُمْ نَفَقٰتُهُمْ اِلَّآ اَنَّهُمْ كَفَرُوْا بِاللّٰهِ وَبِرَسُوْلِهٖ وَلَا يَاْتُوْنَ الصَّلٰوةَ اِلَّا وَهُمْ كُسَالٰى وَلَا يُنْفِقُوْنَ اِلَّا وَهُمْ كٰرِهُوْنَ ﴿٥٤﴾

54. ඔවුන්ගේ ධන පරිත්‍යාගයන් භාරගැනීම අහිමි වී ඇත්තේ අන් කිසිවක් නිසා නොව අල්ලාහ් සහ ඔහුගේ දූතයාව ඔවුන් අවිශ්වාස කරන නිසාත් ඔවුන් අලසකමින් මිස නැමදුමට නොපැමිණෙන නිසාත් පිළිකුලකින් මිස ඔවුන් ධන පරිත්‍යාග නොකරන නිසාත්ය.

فَلَا تُعْجِبْكَ اَمْوَالُهُمْ وَلَآ اَوْلَادُهُمْ ۗ اِنَّمَا يُرِيْدُ اللّٰهُ لِيُعَذِّبَهُمْ بِهَا فِى الْحَيٰوةِ الدُّنْيَا وَتَزْهَقَ اَنْفُسُهُمْ وَهُمْ كٰفِرُوْنَ ﴿٥٥﴾

55. එබැවින් ඔවුන්ගේ ධනයන්ද ඔවුන්ගේ දරුවන්ද ඔබව මවිත නොකරත්වා. මෙලොව ජීවිතයේදී මේ දේවල් වලින් ඔවුන්ට දඬුවම් කිරීමට මෙන්ම ඔවුන් අවිශ්වාසිතයින්ව සිටින අතරතුරෙහිදී ඔවුන්ගේ ආත්මයන් වෙන්වී යෑමට පමණක් අල්ලාහ් අදහස් කරන්නේය.

وَيَحْلِفُوْنَ بِاللّٰهِ اِنَّهُمْ لَمِنْكُمْ ۗ وَمَا هُمْ مِّنْكُمْ وَلٰكِنَّهُمْ قَوْمٌ يَّفْرَقُوْنَ ﴿٥٦﴾

56. තවද ඔවුන් නුඹලාගෙන් නොවූවද, ඇත්තෙන්ම ඔවුන් නුඹලාගෙන් යැයි ඔවුහු අල්ලාහ් මත දිවුරති. එහෙත් ඔවුහු බියගුළු ජනතාවක් වෙති.

لَوْ يَجِدُوْنَ مَلْجَاً اَوْ مَغٰرٰتٍ اَوْ مُدَّخَلًا لَّوَلَّوْا اِلَيْهِ وَهُمْ يَجْمَحُوْنَ ﴿٥٧﴾

57. ඔවුන්ට සරණ පතන තැනක් හෝ ගුහාවන් හෝ රිංගන්නට (එවන්) තැනක් හෝ සොයා ගැනීමට හැකි වන්නේ නම් ඔවුන් ඒ වෙත පාලනයෙන් තොරව වේගයෙන් දිවයනු ඇත.

وَمِنْهُمْ مَّنْ يَّلْمِزُكَ فِى الصَّدَقٰتِ ۚ فَاِنْ اُعْطُوْا مِنْهَا رَضُوْا وَاِنْ لَّمْ يُعْطَوْا مِنْهَآ اِذَا هُمْ يَسْخَطُوْنَ ﴿٥٨﴾

58. තවද ඔවුනතුරින් දන්දීම් (කටයුතු) පිළිබඳව ඔබ කෙරෙහි දොස් පවරන අයද සිටිති. ඔවුනට ඒවායෙන් දෙනුලබන්නේ නම් ඔවුහු තෘප්තිමත් වෙති. එහෙත් ඔවුනට ඒවායෙන් දෙනුනොලබන්නේ නම් බලනු!, ඔවුහු අතෘප්තිමත් වෙති.

وَلَوْ اَنَّهُمْ رَضُوْا مَآ اٰتٰىهُمُ اللّٰهُ

59. අල්ලාහ් මෙන්ම ඔහුගේ දූතයාණන් ඔවුන්ට ලබාදුන් දෙයින්

وَرَسُولُهُۥٓ وَقَالُوا۟ حَسْبُنَا ٱللَّهُ سَيُؤْتِينَا ٱللَّهُ مِن فَضْلِهِۦ وَرَسُولُهُۥٓ إِنَّآ إِلَى ٱللَّهِ رَٰغِبُونَ ﴿٥٩﴾

ඔවුන් තෘප්තිමත් වී, 'අල්ලාහ්ද ඔහුගේ දූතයාණන්ද අපට ප්‍රමාණවත්ය. අල්ලාහ්, ඔහුගේ වරප්‍රසාදයෙන් අපට ලබාදෙන්නේය. තවද ඔහුගේ දූතයාණන්ද එසේ වන්නේය. අල්ලාහ් වෙත අපි යටහත් පහත්ව හැරෙන්නෙමු' යි ඔවුන් කියන්නට යෙදුනේ නම්, (එය ඔවුන්ට වඩාත් යහපත් වන්නට තිබුණි).

إِنَّمَا ٱلصَّدَقَٰتُ لِلْفُقَرَآءِ وَٱلْمَسَٰكِينِ وَٱلْعَٰمِلِينَ عَلَيْهَا وَٱلْمُؤَلَّفَةِ قُلُوبُهُمْ وَفِى ٱلرِّقَابِ وَٱلْغَٰرِمِينَ وَفِى سَبِيلِ ٱللَّهِ وَٱبْنِ ٱلسَّبِيلِ ۖ فَرِيضَةً مِّنَ ٱللَّهِ ۗ وَٱللَّهُ عَلِيمٌ حَكِيمٌ ﴿٦٠﴾

60. දන්දීම් නම්, දුගී දුප්පතුන්ටද අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්ටද ඒ වෙනුවෙන් සේවය සඳහා යෙදී සිටින්නන්ටද ඔවුන්ගේ සිත් (ධර්මය කරා) එකඟත්වයට පත්කරගනු ලැබූ අයටද (නිදහස් වන්නාවූ) වහලුන්ටද ණය වී සිටින අයටද අල්ලාහ්ගේ මාර්ගයේ (පරිශ්‍රමයේ) යෙදෙන්නන්ටද හා මගීන්ටද පමණක් වේ. මෙය අල්ලාහ් වෙතින් නියමයක් වේ. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නය.

وَمِنْهُمُ ٱلَّذِينَ يُؤْذُونَ ٱلنَّبِىَّ وَيَقُولُونَ هُوَ أُذُنٌ ۚ قُلْ أُذُنُ خَيْرٍ لَّكُمْ يُؤْمِنُ بِٱللَّهِ وَيُؤْمِنُ لِلْمُؤْمِنِينَ وَرَحْمَةٌ لِّلَّذِينَ ءَامَنُوا۟ مِنكُمْ ۚ وَٱلَّذِينَ يُؤْذُونَ رَسُولَ ٱللَّهِ لَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿٦١﴾

61. තවද ඔවුනතුරින් වක්තෘවරයාණන්ට හිරිහැර කරන අයද වෙති. තවද 'ඔහු කනක්'යැයි පවසති. 'ඔහු (සියල්ල) ඇහුම්කන්දීම නුඹලාට යහපතක්වේ. ඔහු අල්ලාහ් කෙරෙහි විශ්වාස කරයි. එමෙන්ම විශ්වාසවන්තයින් පිළිබඳව විශ්වාස කරයි. එමෙන්ම නුඹලාගෙන් විශ්වාස කරන අයටද දයාවක් වන්නේයැ'යි ඔබ පවසන්න. තවද අල්ලාහ්ගේ දූතයාණන්ට හිරිහැර කරන්නන්ට වේදනාකාරී දඬුවමක් ඇත.

يَحْلِفُونَ بِٱللَّهِ لَكُمْ لِيُرْضُوكُمْ وَٱللَّهُ وَرَسُولُهُۥٓ أَحَقُّ أَن يُرْضُوهُ إِن كَانُوا۟ مُؤْمِنِينَ ﴿٦٢﴾

62. නුඹලාව තෘප්තිමත් කරවනු පිණිස ඔවුහු නුඹලා වෙත අල්ලාහ් මත දිවුරති. එහෙත් ඔවුන් විශ්වාසිතයින් වේ නම්, ඔවුන් විසින් තෘප්තිමත් කරනු ලැබීමට වඩා සුදුසු වන්නේ අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන්ය.

أَلَمْ يَعْلَمُوٓا۟ أَنَّهُۥ مَن يُحَادِدِ ٱللَّهَ وَرَسُولَهُۥ فَأَنَّ لَهُۥ نَارَ جَهَنَّمَ خَٰلِدًا فِيهَا ۚ

63. කවරෙක් හෝ අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන්ට එරෙහි වන්නේද

ذٰلِكَ الْخِزْيُ الْعَظِيْمُ ﴿٦٣﴾

ඔහුට (නියම වී ඇත්තේ) නිරයේ ගින්න බවත් ඔහු එහිම වාසය කරන බවත් ඔවුන් දැන නොතිබේද? එය අති මහත් අවමානය වේ.

يَحْذَرُ الْمُنٰفِقُوْنَ اَنْ تُنَزَّلَ عَلَيْهِمْ سُوْرَةٌ تُنَبِّئُهُمْ بِمَا فِيْ قُلُوْبِهِمْ ؕ قُلِ اسْتَهْزِءُوْا ۚ اِنَّ اللّٰهَ مُخْرِجٌ مَّا تَحْذَرُوْنَ ﴿٦٤﴾

64. වංචනිකයෝ තමන්ගේ සිත්හි ඇතිදේ තමන්ට දැනුම් දෙන්නාවූ පරිච්ඡේදයක් (සූරතයක්) තමන්ට එරෙහිව පහළ කරනු ලැබේදෝයි බියවෙති. 'නුඹලා සරදම් කරනු! නුඹලා බිය දක්වන දේ නියතවශයෙන්ම අල්ලාහ් හෙළිකරන්නේයැ' යි පවසන්න.

وَلَئِنْ سَاَلْتَهُمْ لَيَقُوْلُنَّ اِنَّمَا كُنَّا نَخُوْضُ وَنَلْعَبُ ؕ قُلْ اَبِاللّٰهِ وَاٰيٰتِهٖ وَرَسُوْلِهٖ كُنْتُمْ تَسْتَهْزِءُوْنَ ﴿٦٥﴾

65. තවද ඔබ ඔවුන්ගෙන් ප්‍රශ්න කළේ නම්, ඔවුහු 'අපි එලක් නැති කථාවේ යෙදෙමින් විහිළු තහළු කරමින් සිටියෙමු'යි නියතවශයෙන්ම කියති. 'අල්ලාහ්ටද ඔහුගේ සළකුණු වලටද ඔහුගේ දූතයාණන්ටද නුඹලා සරදම් කරන්නේ?' යැයි අසන්න.

لَا تَعْتَذِرُوْا قَدْ كَفَرْتُمْ بَعْدَ اِيْمَانِكُمْ ؕ اِنْ نَّعْفُ عَنْ طَآئِفَةٍ مِّنْكُمْ نُعَذِّبْ طَآئِفَةً ۢ بِاَنَّهُمْ كَانُوْا مُجْرِمِيْنَ ﴿٦٦﴾ ع

66. 'නිදහසට කරුණු නොපවසනු. නුඹලාගේ විශ්වාස කිරීමෙන් පසුව නියතවශයෙන්ම නුඹලා අවිශ්වාස කළෙහුය. නුඹලාගෙන් පිරිසකට අප ක්ෂමාව දෙන්නේ නම් තවත් පිරිසකට අපි දඬුවම් කරන්නෙමු. ඒ මන්දයත් ඔවුන් වරදකරුවන් වූ හෙයිනි'.

اَلْمُنٰفِقُوْنَ وَالْمُنٰفِقٰتُ بَعْضُهُمْ مِّنْ بَعْضٍ ۘ يَاْمُرُوْنَ بِالْمُنْكَرِ وَيَنْهَوْنَ عَنِ الْمَعْرُوْفِ وَيَقْبِضُوْنَ اَيْدِيَهُمْ ؕ نَسُوا اللّٰهَ فَنَسِيَهُمْ ؕ اِنَّ الْمُنٰفِقِيْنَ هُمُ الْفٰسِقُوْنَ ﴿٦٧﴾

67. වංචනික පිරිමින් සහ ගැහැණුන් (සියල්ල) එකිනෙකාගෙන් (සම්බන්ධ) වෙති. ඔවුහු නපුර අණකර යහපත් දේ තහනම් කරති. තවද ඔවුන්ගේ අත් හකුළුවා ගනිති. ඔවුන් අල්ලාහ්ව නොසලකා හැරියහ. එබැවින් ඔහුද ඔවුන්ව නොසලකා හැරියේය. නියතවශයෙන්ම වංචනිකයෝම අවනත නොවන්නන් වෙති.

وَعَدَ اللّٰهُ الْمُنٰفِقِيْنَ وَالْمُنٰفِقٰتِ وَالْكُفَّارَ

68. අල්ලාහ් වංචනික පිරිමින්ට හා ගැහැණුන්ටද අවිශ්වාසිතයින්ටද

نَارَ جَهَنَّمَ خَٰلِدِينَ فِيهَا ۚ هِىَ حَسْبُهُمْ ۚ
وَلَعَنَهُمُ ٱللَّهُ ۖ وَلَهُمْ عَذَابٌ مُّقِيمٌ ﴿٦٨﴾

අපායෙහි ගින්න පොරොන්දු වන්නේය. ඔවුහු එහිම වෙසෙති. ඔවුන්ට එය ප්‍රමාණවත් වන්නේය. තවද අල්ලාහ් ඔවුන්ට ශාපකර ඇත්තේය. තවද ඔවුන්ට ස්ථිරවන්නාවූ දඬුවමක්ද අත්වන්නේය.

كَٱلَّذِينَ مِن قَبْلِكُمْ كَانُوٓا۟ أَشَدَّ مِنكُمْ قُوَّةً
وَأَكْثَرَ أَمْوَٰلًا وَأَوْلَٰدًا فَٱسْتَمْتَعُوا۟
بِخَلَٰقِهِمْ فَٱسْتَمْتَعْتُم بِخَلَٰقِكُمْ كَمَا
ٱسْتَمْتَعَ ٱلَّذِينَ مِن قَبْلِكُم بِخَلَٰقِهِمْ
وَخُضْتُمْ كَٱلَّذِى خَاضُوٓا۟ ۚ أُو۟لَٰٓئِكَ
حَبِطَتْ أَعْمَٰلُهُمْ فِى ٱلدُّنْيَا وَٱلْءَاخِرَةِ ۖ
وَأُو۟لَٰٓئِكَ هُمُ ٱلْخَٰسِرُونَ ﴿٦٩﴾

69. නුඹලාට පෙර සිටියවුන් මෙන් ඔවුහු බලයෙන් නුඹලාට වඩා ප්‍රබලවද, වස්තූන්ගෙන් හා දරුවන්ගෙන්ද පොහොසත්ව සිටියහ. ඔවුන් තමන් ලද කොටසින් හැකි පමණින් භුක්ති වින්දහ. එබැවින් නුඹලාට පෙර සිටියවුන් ඔවුන්ගේ කොටස භුක්ති වින්ද පරිද්දෙන් නුඹලාද නුඹලාගේ කොටස භුක්ති වින්දහුය. ඔවුන් නිශ්ඵල කතාවල යෙදුනාක් මෙන් නුඹලාද නිශ්ඵල කතාවල යෙදුනාහුය. තම ක්‍රියාවලින් මෙලොවෙහිදී හා පරලොවෙහිදී ඵලක් නොලබන්නන් වන්නේ ඔවුන්මය. තවද පරාජිතයන් වන්නේ ඔවුන්මය.

أَلَمْ يَأْتِهِمْ نَبَأُ ٱلَّذِينَ مِن قَبْلِهِمْ قَوْمِ
نُوحٍ وَعَادٍ وَثَمُودَ ۙ وَقَوْمِ إِبْرَٰهِيمَ
وَأَصْحَٰبِ مَدْيَنَ وَٱلْمُؤْتَفِكَٰتِ ۚ أَتَتْهُمْ
رُسُلُهُم بِٱلْبَيِّنَٰتِ ۖ فَمَا كَانَ ٱللَّهُ
لِيَظْلِمَهُمْ وَلَٰكِن كَانُوٓا۟ أَنفُسَهُمْ
يَظْلِمُونَ ﴿٧٠﴾

70. ඔවුනට පෙර සිටි නූහ්ගේ ජනතාවද, තවද ආද් ද, සමූද් ද, තවද ඉබ්රාහීම්ගේ ජනතාවද, තවද මද්යන් හි වැසියන්ද, තවද සුනුවිසුණු කරන ලද නගරයන්ද, පිළිබඳව පුවත ඔවුන්ට නොපැමිණියේද? ඔවුන්ගේ දූතයන් ඔවුන් වෙත පැමිණියේ පැහැදිලි සලකුණු සමගය. අල්ලාහ් ඔවුනට වරදක් නොකළේය. එහෙත් ඔවුහු තමන්ටම වැරදි කර ගත්හ.

وَٱلْمُؤْمِنُونَ وَٱلْمُؤْمِنَٰتُ بَعْضُهُمْ أَوْلِيَآءُ
بَعْضٍ ۚ يَأْمُرُونَ بِٱلْمَعْرُوفِ وَيَنْهَوْنَ
عَنِ ٱلْمُنكَرِ وَيُقِيمُونَ ٱلصَّلَوٰةَ وَيُؤْتُونَ

71. තවද විශ්වාසිත පුරුෂයින් ද විශ්වාසිත ස්ත්‍රීන් ද ඔවුන් එකිනෙකාගේ මිතුරන් වෙති. ඔවුහු යහපත් දේ අණ කරති. තවද නපුර තහනම් කරති. තවද නමස්කාරයෙහි යෙදෙති. තවද zසකාත් (දුගී බද්ද)

ගෙවති. තවද අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාට අවනත වෙති. අල්ලාහ් දයාව දක්වන්නේ මොවුන්ටමය. සැබැවින්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

الزَّكٰوةَ وَيُطِيعُونَ اللّٰهَ وَرَسُولَهُ ۚ
أُولٰٓئِكَ سَيَرْحَمُهُمُ اللّٰهُ ۗ إِنَّ اللّٰهَ
عَزِيزٌ حَكِيمٌ ﴿٧١﴾

72. විශ්වාසිත පුරුෂයින්ට සහ ස්ත්‍රීන්ට, පහළින් ගලා බසිනා දිය දහරාවලින් යුත් උද්‍යානයන් අල්ලාහ් පොරොන්දු වී ඇත. පවිත්‍ර වාසස්ථානයන්ගෙන් යුත් නිත්‍ය උද්‍යානයන්හි ඔවුහු සදාකල් වෙසෙති. තවද අල්ලාහ්ගේ තෘප්තිය සියල්ලටම වඩා අති මහත් වේ. එය අති ශ්‍රේෂ්ඨ ජයග්‍රහණයකි.

وَعَدَ اللّٰهُ الْمُؤْمِنِينَ وَالْمُؤْمِنٰتِ جَنّٰتٍ
تَجْرِي مِنْ تَحْتِهَا الْأَنْهٰرُ خٰلِدِينَ فِيهَا
وَمَسٰكِنَ طَيِّبَةً فِي جَنّٰتِ عَدْنٍ ۚ
وَرِضْوٰنٌ مِّنَ اللّٰهِ أَكْبَرُ ۚ ذٰلِكَ هُوَ
الْفَوْزُ الْعَظِيمُ ﴿٧٢﴾ ع

73. ඕ වක්තෘවරයාණෙනි! අවිශ්වාසිතයින්ට හා වංචනිකයින්ට එරෙහිව සටන් කරන්න. ඔවුන් කෙරෙහි දැඩිව සිටින්න. ඔවුන්ගේ වාසස්ථානය නිරය වේ. තවද එය නපුරු නවාතැනකි.

يٰٓأَيُّهَا النَّبِيُّ جٰهِدِ الْكُفَّارَ وَالْمُنٰفِقِينَ
وَاغْلُظْ عَلَيْهِمْ ۚ وَمَأْوٰىهُمْ جَهَنَّمُ ۖ
وَبِئْسَ الْمَصِيرُ ﴿٧٣﴾

74. තමන් කිසිවක් නොකීබවට ඔවුන් අල්ලාහ් මත දිවුරති. එහෙත් නියතවශයෙන්ම ඔවුහු අවිශ්වාසිත බස් දොඩා ඇත. තවද ඉස්ලාම් ධර්මය වැළඳගත් පසු අවිශ්වාසිතයන් වූහ. ඔවුන්ට ලබාගත නොහැකි දේ කෙරෙහි ඔවුහු අධිෂ්ඨාන කළහ. ඔවුන් වෛරය වර්ධනය කිරීමට හේතුව වන්නේ අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් මොවුන්ව (විශ්වාසිතයින්ව) ඔහුගේ වරප්‍රසාදයෙන් සාරවත් කළ නිසාම පමණි. නමුත් ඔවුන් පසුතැවිලි වන්නේ නම් එය ඔවුන්ට වඩාත් යහපත් වේ. එහෙත් ඔවුන් පිටුපාන්නේ නම් මෙලොවදී මෙන්ම මතුලොවදීත් ඔවුනට අල්ලාහ් දැඩි දඬුවම් දෙන්නේය. තවද ඔවුනට

يَحْلِفُونَ بِاللّٰهِ مَا قَالُوا ۗ وَلَقَدْ قَالُوا
كَلِمَةَ الْكُفْرِ وَكَفَرُوا بَعْدَ إِسْلٰمِهِمْ
وَهَمُّوا بِمَا لَمْ يَنَالُوا ۚ وَمَا نَقَمُوٓا إِلَّآ
أَنْ أَغْنٰىهُمُ اللّٰهُ وَرَسُولُهُ مِنْ فَضْلِهِ ۚ
فَإِنْ يَتُوبُوا يَكُ خَيْرًا لَّهُمْ ۖ وَإِنْ يَتَوَلَّوْا
يُعَذِّبْهُمُ اللّٰهُ عَذَابًا أَلِيمًا ۙ فِي الدُّنْيَا
وَالْآخِرَةِ ۚ وَمَا لَهُمْ فِي الْأَرْضِ مِنْ وَّلِيٍّ

وَّلَا نَصِيْرٍ ﴿٧٤﴾

පොළොවෙහි මිතුරෙකු හෝ උදව්කරුවෙකු නොවනු ඇත.

وَمِنْهُمْ مَّنْ عٰهَدَ اللّٰهَ لَئِنْ اٰتٰنَا مِنْ فَضْلِهٖ لَنَصَّدَّقَنَّ وَلَنَكُوْنَنَّ مِنَ الصّٰلِحِيْنَ ﴿٧٥﴾

75. තවද 'ඔහු තම වරප්‍රසාදයෙන් යමක් දෙන්නේ නම්, නියතවශයෙන්ම අපි (ඔහුගේ මාර්ගයෙහි) දන් දෙන්නෙමු. තවද අපි නියතවශයෙන්ම දැහැමියන් බවට පත්වන්නෙමු'යි (පවසමින්) අල්ලාහ් සමග ගිවිසගත් අයද ඔවුන් අතර වෙති.

فَلَمَّآ اٰتٰهُمْ مِّنْ فَضْلِهٖ بَخِلُوْا بِهٖ وَتَوَلَّوْا وَّهُمْ مُّعْرِضُوْنَ ﴿٧٦﴾

76. එහෙත් ඔහු තම වරප්‍රසාදයෙන් ඔවුනට ලබාදුන් විට, ඔවුන් එයින් මසුරුකම් කළහ. තවද ඔවුන් පිටුපාමින් හැරී ගියහ.

فَاَعْقَبَهُمْ نِفَاقًا فِيْ قُلُوْبِهِمْ اِلٰى يَوْمِ يَلْقَوْنَهٗ بِمَآ اَخْلَفُوا اللّٰهَ مَا وَعَدُوْهُ وَبِمَا كَانُوْا يَكْذِبُوْنَ ﴿٧٧﴾

77. එබැවින්, ඔවුන් අල්ලාහ්ට දුන් ප්‍රතිඥාව කඩකල හෙයින්ද තවද ඔවුන් බොරු කී හෙයින්ද ඔවුන් ඔහුව හමුවන්නා වූ දිනය තෙක් ඔවුන්ගේ හදවත්හි වංචනිකභාවය (පැවතීම) ඔහු ඔවුන්ට ප්‍රතිවිපාකයක් ලෙස දුන්නේය.

اَلَمْ يَعْلَمُوْٓا اَنَّ اللّٰهَ يَعْلَمُ سِرَّهُمْ وَنَجْوٰىهُمْ وَاَنَّ اللّٰهَ عَلَّامُ الْغُيُوْبِ ﴿٧٨﴾

78. අල්ලාහ් ඔවුන්ගේ රහස් මෙන්ම ඔවුන්ගේ සැඟවුණු යෝජනාවන් ගැන දන්නේ යැයිද, නොපෙනෙන දේ හොඳින්ම දැන සිටින්නා අල්ලාහ් යැයිද ඔවුන් නොදන්නේද?

اَلَّذِيْنَ يَلْمِزُوْنَ الْمُطَّوِّعِيْنَ مِنَ الْمُؤْمِنِيْنَ فِي الصَّدَقٰتِ وَالَّذِيْنَ لَا يَجِدُوْنَ اِلَّا جُهْدَهُمْ فَيَسْخَرُوْنَ مِنْهُمْ ؕ سَخِرَ اللّٰهُ مِنْهُمْ ۫ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿٧٩﴾

79. සිය කැමැත්තෙන්ම දන්දෙන්නාවූ, එමෙන්ම වෙහෙස මහන්සිවී ඉපැයූ දෙය හැරෙන්නට අන් දෙයක් නොදෙන්නාවූ විශ්වාසිතයින්ගේ දොස් සොයන්නෝ ඔවුන්මය. තවද ඔවුන් මොවුන්ට (විශ්වාසිතයින්ට) සරදම් කරති. ඔවුන්ගේ සරදමට අල්ලාහ් ප්‍රතිවිපාක දෙන්නේය. තවද ඔවුනට දැඩි දඬුවමක් ඇත.

اِسْتَغْفِرْ لَهُمْ اَوْ لَا تَسْتَغْفِرْ لَهُمْ ؕ اِنْ

80. ඔවුන් වෙනුවෙන් ඔබ සමාව අයැද සිටියද, ඔවුන්

تَسْتَغْفِرْ لَهُمْ سَبْعِيْنَ مَرَّةً فَلَنْ يَّغْفِرَ اللّٰهُ لَهُمْ ؕ ذٰلِكَ بِاَنَّهُمْ كَفَرُوْا بِاللّٰهِ وَرَسُوْلِهٖ ؕ وَاللّٰهُ لَا يَهْدِى الْقَوْمَ الْفٰسِقِيْنَ ﴿٨٠﴾

වෙනුවෙන් ඔබ සමාව අයැද නොසිටියද, ඔබ හැත්තෑවතාවක් සමාව අයැද සිටියද අල්ලාහ් කිසිවිටෙක ඔවුන්ට සමාව නොදෙන්නේය. ඒ මන්දයත් ඔවුන් අල්ලාහ් සහ ඔහුගේ දූතයා කෙරෙහි අවිශ්වාසිත වූ බැවිනි. තවද අල්ලාහ් ද්‍රෝහී ජනයාට යහමග නොපෙන්වන්නේය.

فَرِحَ الْمُخَلَّفُوْنَ بِمَقْعَدِهِمْ خِلٰفَ رَسُوْلِ اللّٰهِ وَكَرِهُوْۤا اَنْ يُّجَاهِدُوْا بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ فِىْ سَبِيْلِ اللّٰهِ وَقَالُوْا لَا تَنْفِرُوْا فِى الْحَرِّ ؕ قُلْ نَارُ جَهَنَّمَ اَشَدُّ حَرًّا ؕ لَوْ كَانُوْا يَفْقَهُوْنَ ﴿٨١﴾

81. පසුබටවන්නට (සැලසුම් කළ අය) අල්ලාහ්ගේ දූතයාණන්ට එරෙහිව ඔහුගේ පසුපස සිටීම ගැන ප්‍රීතියට පත්වූහ. තවද ඔවුන් සිය දේපල හා ජීවිත මගින් අල්ලාහ් වෙනුවෙන් පරිශ්‍රමයෙහි යෙදීම පිළිකුල් කළහ. තවද 'අව්කාශ්ධකයේ නොයනු.' යි ඔවුහු කීහ. 'නිරයෙහි ගිනිදැල් අව්කාශ්ධකයට වඩා කුරිරුයැ'යි කියන්න. ඔවුන් මෙය තේරුම්ගත යුතුනේද!

فَلْيَضْحَكُوْا قَلِيْلًا وَّلْيَبْكُوْا كَثِيْرًا ۚ جَزَآءًۢ بِمَا كَانُوْا يَكْسِبُوْنَ ﴿٨٢﴾

82. ඔවුන් මඳක් සිනාසිය යුතුය. තවද ඔවුන් උපයමින් සිටි දේ හේතුකොට ගෙන බෙහෙවින් වැළපිය යුතුය.

فَاِنْ رَّجَعَكَ اللّٰهُ اِلٰى طَآئِفَةٍ مِّنْهُمْ فَاسْتَاْذَنُوْكَ لِلْخُرُوْجِ فَقُلْ لَّنْ تَخْرُجُوْا مَعِىَ اَبَدًا وَّلَنْ تُقَاتِلُوْا مَعِىَ عَدُوًّا ؕ اِنَّكُمْ رَضِيْتُمْ بِالْقُعُوْدِ اَوَّلَ مَرَّةٍ فَاقْعُدُوْا مَعَ الْخٰلِفِيْنَ ﴿٨٣﴾

83. තවද අල්ලාහ් ඔබව ඔවුන්ගෙන් පිරිසක් වෙත ආපසු යවා, එමෙන්ම ඔවුන් ඔබගෙන් (සටන් කිරීම සඳහා) පෙරට යාමට අවසරය ඉල්ලා සිටියහොත්, එවිට 'නුඹලා කිසිවිටකත් මා සමඟ පෙරට නොයනු ඇත. තවද කිසිවිටකත් මා සමඟ සතුරෙකුට එරෙහිව සටන් නොවදිනු ඇත. මුල් වාරයේදී නුඹලා (නිවසෙහි රැඳී) සිටීමට කැමති වූහ. එබැවින් පසුපස නැවතී සිටින්නන් සමඟ දැන් නුඹලාද රැඳී සිටිනු'යි පවසන්න.

وَلَا تُصَلِّ عَلٰٓى اَحَدٍ مِّنْهُمْ مَّاتَ اَبَدًا وَّلَا تَقُمْ عَلٰى قَبْرِهٖ ؕ اِنَّهُمْ كَفَرُوْا بِاللّٰهِ

84. ඔවුන්ගෙන් මිය යන කිසිම කෙනෙකු කෙරෙහි කිසිවිටෙකත් (ජනාzසා) යාච්ඤා නොකරන්න. ඔහුගේ සොහොන අසල (ප්‍රාර්ථනා

وَرَسُوْلِهٖ وَمَاتُوْا وَهُمْ فٰسِقُوْنَ ﴿٨٤﴾

කිරීමට) නොසිටින්න. මන්දයත් ඔවුන් අවනත නොවන්නන් වී සිටියදී අල්ලාහ් සහ ඔහුගේ දූතයා කෙරෙහි අවිශ්වාස කළ බැවිනි.

وَلَا تُعْجِبْكَ اَمْوَالُهُمْ وَاَوْلَادُهُمْ ؕ اِنَّمَا يُرِيْدُ اللّٰهُ اَنْ يُّعَذِّبَهُمْ بِهَا فِى الدُّنْيَا وَتَزْهَقَ اَنْفُسُهُمْ وَهُمْ كٰفِرُوْنَ ﴿٨٥﴾

85. තවද ඔවුන්ගේ ධනසම්පත් හා ඔවුන්ගේ දරුවන් ඔබව විස්මයට පත්නොකල යුතුය. අල්ලාහ් අදහස් කරනුයේ ඔවුන්ට මෙලොවෙහි ඒවා මගින් ඔවුනට දඬුවම් දෙන්නටත්, ඔවුන් අවිශ්වාසිතයින්ව සිටියදී ඔවුන්ගේ ආත්මයන් ඔවුන්ගෙන් වෙන්වී යාමටත් පමණි.

وَاِذَاۤ اُنْزِلَتْ سُوْرَةٌ اَنْ اٰمِنُوْا بِاللّٰهِ وَجَاهِدُوْا مَعَ رَسُوْلِهِ اسْتَاْذَنَكَ اُولُوا الطَّوْلِ مِنْهُمْ وَقَالُوْا ذَرْنَا نَكُنْ مَّعَ الْقٰعِدِيْنَ ﴿٨٦﴾

86. තවද 'අල්ලාහ් කෙරෙහි විශ්වාස කරනු. තවද ඔහුගේ දූතයාණන් සමඟ එක්වී (අල්ලාහ්ගේ මාර්ගයෙහි) පරිශ්‍රමය දරනු'යි (නියම කරමින්) පරිච්ඡේදයක් (සූරතයක්) පහළ කරනු ලබන විට, ඔවුන්ගෙන් ධනවත් අය ඔබගෙන් අවසර ඉල්ලමින් '(නිවසෙහි) රැඳී සිටින්නන් සමඟ අපද වන්නට ඉඩ හරිනු'යි පවසති.

رَضُوْا بِاَنْ يَّكُوْنُوْا مَعَ الْخَوَالِفِ وَطُبِعَ عَلٰى قُلُوْبِهِمْ فَهُمْ لَا يَفْقَهُوْنَ ﴿٨٧﴾

87. ඔවුන් රැඳී සිටින්නාවූ ස්ත්‍රීන් සමඟ සිටින්නට කැමති වෙති. තවද ඔවුන්ගේ හදවත්හි මුද්‍රාතබන ලදී. එබැවින් ඔවුන් තේරුම් නොගනිති.

لٰكِنِ الرَّسُوْلُ وَالَّذِيْنَ اٰمَنُوْا مَعَهٗ جٰهَدُوْا بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ ؕ وَاُولٰٓئِكَ لَهُمُ الْخَيْرٰتُ ۫ وَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ﴿٨٨﴾

88. එහෙත් දූතයාණන් මෙන්ම ඔහු සමඟ විශ්වාස කරන අය ඔවුන්ගේ දේපළ සහ ජීවිතයන් මගින් (අල්ලාහ්ගේ මාර්ගයෙහි) පරිශ්‍රමය දරති. තවද සියළු යහපත් දේවල් හිමිවන්නේ ඔවුන්ටමය. තවද සමෘද්ධිමත් වන්නෝද ඔවුන්මය.

اَعَدَّ اللّٰهُ لَهُمْ جَنّٰتٍ تَجْرِىْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَا ؕ ذٰلِكَ الْفَوْزُ الْعَظِيْمُ ﴿٨٩﴾ ع

89. ඔවුන් වෙනුවෙන් පහලින් ගලාබස්නා ගංගාවන් සහිත උද්‍යානයන් අල්ලාහ් පිළියෙල කොට ඇත්තේය. ඔවුහු එහි ම වෙසෙන්නෝය. මෙය උතුම්වූ ජයග්‍රහණය වේ.

وَجَآءَ الْمُعَذِّرُوْنَ مِنَ الْاَعْرَابِ لِيُؤْذَنَ لَهُمْ وَقَعَدَ الَّذِيْنَ كَذَبُوا اللّٰهَ وَرَسُوْلَهٗ ؕ سَيُصِيْبُ الَّذِيْنَ كَفَرُوْا مِنْهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿۹۰﴾

90. තවද ගැමි අරාබි වරුන්ගෙන් නිදහසට කරුණු දක්වන අය පැමිණ ඔවුනට (පසුපස රැඳිසිටීමට) අවසර දෙන ලෙස ඉල්ලීම් කරති. තවද අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන්ට බොරු කළ අය (නිවසෙහි) නැවතී සිටියහ. ඔවුන්ගෙන් අවිශ්වාස කරන අයට වේදනාකාරී දඬුවමක් අත් වන්නේමය.

لَيْسَ عَلَى الضُّعَفَآءِ وَلَا عَلَى الْمَرْضٰى وَلَا عَلَى الَّذِيْنَ لَا يَجِدُوْنَ مَا يُنْفِقُوْنَ حَرَجٌ اِذَا نَصَحُوْا لِلّٰهِ وَرَسُوْلِهٖ ؕ مَا عَلَى الْمُحْسِنِيْنَ مِنْ سَبِيْلٍ ؕ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ۙ﴿۹۱﴾

91. අල්ලාහ්ට මෙන්ම ඔහුගේ දූතයාණන්ට ඔවුන් අවංක වන්නේ නම් දුබලයින්ටද රෝගීන්ටද එමෙන්ම කිසිවක් වැයකරන්නට නොහැක්කන්ටද දොස් පැවරීමක් නැත. යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන්ට එරෙහිව අවලාද කිරීමට හේතුවක් නැත. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَّلَا عَلَى الَّذِيْنَ اِذَا مَاۤ اَتَوْكَ لِتَحْمِلَهُمْ قُلْتَ لَاۤ اَجِدُ مَاۤ اَحْمِلُكُمْ عَلَيْهِ ۪ تَوَلَّوْا وَّاَعْيُنُهُمْ تَفِيْضُ مِنَ الدَّمْعِ حَزَنًا اَلَّا يَجِدُوْا مَا يُنْفِقُوْنَ ؕ﴿۹۲﴾

92. තවද මේ අයට එරෙහිවද (දොස් පැවරීමක්) නැත. මොවුන් (සතුන්) පිට නැග යාමට කිසියම් පිළියමක් ඔබ කළ යුතුයැයි ඔබ වෙත පැමිණි විට 'නුඹලා (සතුන්) පිට නැග යාමට සැලැස්වීමට මා හට නොහැක' යැයි ඔබ මොවුනට පිළිතුරු දුන්නේය. (මෙය අසා) මොවුන් ආපසු හැරී ගියෝය. (අල්ලාහ්ගේ මාර්ගයෙහි) වැය කිරීමට මොවුන් වෙත කිසිවක් නොමැති හේතුවෙන් දුකට පත්ව මොවුන්ගේ ඇස් වලින් කඳුළු පිරී සැලුනේය.

اِنَّمَا السَّبِيْلُ عَلَى الَّذِيْنَ يَسْتَاْذِنُوْنَكَ وَهُمْ اَغْنِيَآءُ ۚ رَضُوْا بِاَنْ يَّكُوْنُوْا مَعَ الْخَوَالِفِ ۙ وَطَبَعَ اللّٰهُ عَلٰى قُلُوْبِهِمْ فَهُمْ لَا يَعْلَمُوْنَ ﴿۹۳﴾

93. අවලාද කිරීමට හේතුවක් වන්නේ යම් අය ධනවත්ව සිටියදී ඔබගේ අවසරය ඉල්ලා සිටින්නේද ඒ අයට එරෙහිව පමණි. ඔවුන් රැඳී සිටින්නාවූ ස්ත්‍රීන් සමඟ සිටින්නට කැමති වෙති. තවද අල්ලාහ් ඔවුන්ගේ හදවත්හි මුද්‍රාව තැබුවේය. එබැවින් ඔවුහු එය නොදනිති.

11 කොටස

يَعْتَذِرُونَ إِلَيْكُمْ إِذَا رَجَعْتُمْ إِلَيْهِمْ ۚ قُل لَّا تَعْتَذِرُوا لَن نُّؤْمِنَ لَكُمْ قَدْ نَبَّأَنَا اللَّهُ مِنْ أَخْبَارِكُمْ ۚ وَسَيَرَى اللَّهُ عَمَلَكُمْ وَرَسُولُهُ ثُمَّ تُرَدُّونَ إِلَىٰ عَالِمِ الْغَيْبِ وَالشَّهَادَةِ فَيُنَبِّئُكُم بِمَا كُنتُمْ تَعْمَلُونَ ﴿٩٤﴾

94. නුඹලා ඔවුන් වෙත ආපසු පැමිණෙන විට ඔවුහු නුඹලාට නිදහසට කරුණු කියන්නෝය. 'නිදහසට කරුණු නොකියනු. අපි නුඹලාව පිළිනොගන්නෙමු. අල්ලාහ් දැනටමත් නුඹලා ගැන අපට කරුණු දන්වා ඇත. තවද අල්ලාහ් නුඹලාගේ ක්‍රියාව බලන්නේය. තවද ඔහුගේ දූතයාණන්ද (එසේ කරන්නේය). පසුව නුඹලාව දෘෂ්‍යමාන හා අදෘෂ්‍යමාන දේ දන්නා ඔහු වෙතට ආපසු ගෙන එනු ලබන්නෝය. පසුව ඔහු නුඹලා කරමින් සිටි සියළු දේම නුඹලාට දන්වන්නේයැ'යි පවසන්න.

سَيَحْلِفُونَ بِاللَّهِ لَكُمْ إِذَا انقَلَبْتُمْ إِلَيْهِمْ لِتُعْرِضُوا عَنْهُمْ ۖ فَأَعْرِضُوا عَنْهُمْ ۖ إِنَّهُمْ رِجْسٌ ۖ وَمَأْوَاهُمْ جَهَنَّمُ جَزَاءً بِمَا كَانُوا يَكْسِبُونَ ﴿٩٥﴾

95. නුඹලා ඔවුන් වෙතට ආපසු පැමිණෙන විට නුඹලා ඔවුන්ව නිදැල්ලේ හරින්නට ඔවුහු අල්ලාහ් මත නුඹලා ඉදිරියෙහි දිවිරන්නෝය. එබැවින් ඔවුන්ව නිදැල්ලේ හරිනු. නියතවශයෙන්ම ඔවුහු පිළිකුල් අය වෙති. ඔවුන්ගේ වාසස්ථානය නිරය වේ. මෙය ඔවුන් උපයමින් සිටි දේ සඳහා (සරිලන) ප්‍රතිවිපාකයකි.

يَحْلِفُونَ لَكُمْ لِتَرْضَوْا عَنْهُمْ ۖ فَإِن تَرْضَوْا عَنْهُمْ فَإِنَّ اللَّهَ لَا يَرْضَىٰ عَنِ الْقَوْمِ الْفَاسِقِينَ ﴿٩٦﴾

96. නුඹලා ඔවුන් සමග තෘප්තිමත් වනු පිණිස ඔවුහු නුඹලා ඉදිරියෙහි දිවිරන්නෝය. එහෙත් නුඹලා ඔවුන් සමග තෘප්තිමත් වුවද අල්ලාහ් කැරලිකාර ජනයා සමග තෘප්තිමත් නොවන්නේය.

الْأَعْرَابُ أَشَدُّ كُفْرًا وَنِفَاقًا وَأَجْدَرُ أَلَّا يَعْلَمُوا حُدُودَ مَا أَنزَلَ اللَّهُ عَلَىٰ رَسُولِهِ ۗ وَاللَّهُ عَلِيمٌ حَكِيمٌ ﴿٩٧﴾

97. ගම්වාසී අරාබිවරු අවිශ්වාසීත බවින් සහ වංචනික බවින් ඉතා දැඩිය. තවද අල්ලාහ්, ඔහුගේ දූතයාණන් වෙත පහළ කර ඇති (අනාවරණය) නීතිරීතීන් නොදැන සිටීමට දැඩි හුරුබවක් දක්වති. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥා සම්පන්නය.

وَمِنَ الْأَعْرَابِ مَن يَتَّخِذُ مَا يُنفِقُ

98. තවද (අල්ලාහ්ගේ මාර්ගයෙහි) වැයකරන දේ දඩයක් සේ

مَغْرَمًا وَّ يَتَرَبَّصُ بِكُمُ الدَّوَآئِرَ ۗ عَلَيْهِمْ دَآئِرَةُ السَّوْءِ ۗ وَاللّٰهُ سَمِيْعٌ عَلِيْمٌ ﴿٩٨﴾

සලකන හා නුඹලාට විපත් අත්වන්නේ යැයි (ආශාවෙන්) බලාපොරොත්තුවෙන අයද කාන්තාර අරාබිවරුන් අතර වෙති. නපුරු විපත ඔවුන්ටම අත්වේවා! තවද අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

وَمِنَ الْاَعْرَابِ مَنْ يُّؤْمِنُ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ وَيَتَّخِذُ مَا يُنْفِقُ قُرُبٰتٍ عِنْدَ اللّٰهِ وَصَلَوٰتِ الرَّسُوْلِ ۗ اَلَآ اِنَّهَا قُرْبَةٌ لَّهُمْ ۗ سَيُدْخِلُهُمُ اللّٰهُ فِيْ رَحْمَتِهٖ ۗ اِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٩٩﴾ ع

99. තවද අල්ලාහ් කෙරෙහිද අවසන් දිනය කෙරෙහිද විශ්වාස කරන එමෙන්ම තමන් වැය කරන දේ අල්ලාහ් වෙත සමීපවීම සඳහාද වක්තෘවරයාගේ ආශිර්වාදයන් (ලබාගැනීම) සඳහාද මාර්ගයක් ලෙස සලකන අයද ගැමි අරාබිවරුන් අතර සිටිති. අසනු! නියතවශයෙන්ම එය ඔවුනට (අල්ලාහ් වෙත) සමීපවීමට මාර්ගයක් වේ. අල්ලාහ් ඔවුන්ව තම දයාවෙහි ඉක්මනින්ම ඇතුල් කරවන්නේය. නියතවශයෙන්ම, අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

وَالسّٰبِقُوْنَ الْاَوَّلُوْنَ مِنَ الْمُهٰجِرِيْنَ وَالْاَنْصَارِ وَالَّذِيْنَ اتَّبَعُوْهُمْ بِاِحْسَانٍ ۙ رَّضِيَ اللّٰهُ عَنْهُمْ وَرَضُوْا عَنْهُ وَاَعَدَّ لَهُمْ جَنّٰتٍ تَجْرِيْ تَحْتَهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَآ اَبَدًا ۗ ذٰلِكَ الْفَوْزُ الْعَظِيْمُ ﴿١٠٠﴾

100. තවද (විශ්වාසිතයින්ගෙන්) සංක්‍රමණිකයන්* හා උදව්කරුවන්** (අතුරින්) මුලින්ම පෙරමග ගත් අයද එමෙන්ම විශිෂ්ඨ ලෙස ඔවුන්ව අනුගමනය කළ අයද ගත්කල ඔවුන් කෙරෙහි අල්ලාහ් තෘප්තිමත් වු අතර ඔවුන්ද ඔහු කෙරෙහි තෘප්තියට පත්වූහ. ඔහු ඔවුන් සඳහා පහලින් ගලාබස්නා ගංගාවලින් යුත් උද්‍යානයන් පිළියෙල කර ඇත. ඔවුහු එහිම සදාකල් වෙසෙති. එය ශ්‍රේෂ්ඨතම ජයග්‍රහණයක් වේ.

وَمِمَّنْ حَوْلَكُمْ مِّنَ الْاَعْرَابِ مُنٰفِقُوْنَ ۛ وَمِنْ اَهْلِ الْمَدِيْنَةِ ۛ مَرَدُوْا عَلَى النِّفَاقِ ۖ لَا تَعْلَمُهُمْ ۗ نَحْنُ

101. නුඹලා වටා සිටින ගැමි අරාබිවරුන්ගෙන් (සමහරෙක්) වංචනිකයන් වෙති. තවද මදිනාවෙහි ජනතාවන්ගෙන්(ද) එවැන්නන් වෙති. ඔවුහු වංචනික බවෙහි ගිලිහී සිටිති. ඔබ ඔවුන්ව නොදන්නෙහිය. අපි ඔවුන්ව දනිමු. අපි ඔවුනට දෙවරක්

*මක්කමේ සිට **මදිනාවෙහි

نَعۡلَمُهُمۡ ۚ سَنُعَذِّبُهُم مَّرَّتَيۡنِ ثُمَّ يُرَدُّونَ إِلَىٰ عَذَابٍ عَظِيمٍ ﴿١٠١﴾

දඬුවම් කරන්නෙමු. පසුව මහත්වූ දඬුවමක් වෙත ඔවුන්ව ගෙනයනු ලබන්නේය.

وَءَاخَرُونَ ٱعۡتَرَفُواْ بِذُنُوبِهِمۡ خَلَطُواْ عَمَلٗا صَٰلِحٗا وَءَاخَرَ سَيِّئًا عَسَى ٱللَّهُ أَن يَتُوبَ عَلَيۡهِمۡ ۚ إِنَّ ٱللَّهَ غَفُورٞ رَّحِيمٌ ﴿١٠٢﴾

102. තවද තමන්ගේ වැරදි පිළිගත් තවත් සමහරුන්(ද) සිටිති. ඔවුන් යහපත් ක්‍රියා වෙනත් අයහපත් ක්‍රියාවන් සමග මුසුකර ගත්හ. අල්ලාහ් ඔවුන් කෙරෙහි දයාවෙන් යුතුව හැරෙන්නට ඉඩ ඇත. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, දයාබරය.

خُذۡ مِنۡ أَمۡوَٰلِهِمۡ صَدَقَةٗ تُطَهِّرُهُمۡ وَتُزَكِّيهِم بِهَا وَصَلِّ عَلَيۡهِمۡ ۖ إِنَّ صَلَوٰتَكَ سَكَنٞ لَّهُمۡ ۗ وَٱللَّهُ سَمِيعٌ عَلِيمٌ ﴿١٠٣﴾

103. ඔවුන්ගේ වස්තුවෙන් දානය ලබාගන්න. එමගින් ඔබ ඔවුන්ව පිරිසුදු කරන්නේය. තවද ඔවුන්ව පවිත්‍රත්වයට පත් කරන්නේය. තවද ඔවුන් වෙනුවෙන් යාච්ඤා කරන්න. ඔබගේ යාච්ඤාව ඔවුනට ඇත්තෙන්ම ශාන්තභාවය(ට හේතුවක්) වේ. අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

أَلَمۡ يَعۡلَمُوٓاْ أَنَّ ٱللَّهَ هُوَ يَقۡبَلُ ٱلتَّوۡبَةَ عَنۡ عِبَادِهِۦ وَيَأۡخُذُ ٱلصَّدَقَٰتِ وَأَنَّ ٱللَّهَ هُوَ ٱلتَّوَّابُ ٱلرَّحِيمُ ﴿١٠٤﴾

104. තම දාසයින්ගේ පශ්චාත්තාප පිළිගන්නාද දානය පිළිගන්නාද අල්ලාහ්ම බවත්, එමෙන්ම පශ්චාත්තාප භාරගන්නාද, පරම දයාබරයාද, අල්ලාහ්ම බවත් ඔවුන් නොදන්නේද?

وَقُلِ ٱعۡمَلُواْ فَسَيَرَى ٱللَّهُ عَمَلَكُمۡ وَرَسُولُهُۥ وَٱلۡمُؤۡمِنُونَ ۖ وَسَتُرَدُّونَ إِلَىٰ عَٰلِمِ ٱلۡغَيۡبِ وَٱلشَّهَٰدَةِ فَيُنَبِّئُكُم بِمَا كُنتُمۡ تَعۡمَلُونَ ﴿١٠٥﴾

105. තවද 'නුඹලා ක්‍රියා කරමින් සිටිනු! සැබැවින්ම අල්ලාහ් නුඹලාගේ ක්‍රියාවන් බලමින් සිටින්නේය. එමෙන්ම ඔහුගේ දූතයාණන්ද විශ්වාසිතයින්ද එසේම වන්නේය. තවද දෘෂ්‍යමාන හා අදෘෂ්‍යමාන දේ දන්නාවූ ඔහු වෙතට නුඹලාව නැවත හරවනු ලබන්නෝය. එවිට ඔහු නුඹලා කරමින් සිටි සියල්ල නුඹලාට කියනු ඇත' යි පවසන්න.

وَءَاخَرُونَ مُرۡجَوۡنَ لِأَمۡرِ ٱللَّهِ إِمَّا يُعَذِّبُهُمۡ وَإِمَّا يَتُوبُ عَلَيۡهِمۡ ۗ وَٱللَّهُ

106. අල්ලාහ්ගේ තීන්දුව අපේක්ෂාවෙන් සිටිනු ලැබූ අනෙකුත් අය(ද) වෙති. ඔහු ඔවුනට දඬුවම්

عَلِيمٌ حَكِيمٌ ﴿١٠٦﴾

කරයි. නැතිනම් ඔහු ඔවුන් කෙරෙහි කරුණාවෙන් යුතුව හැරෙයි. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

وَالَّذِينَ اتَّخَذُوا مَسْجِدًا ضِرَارًا وَكُفْرًا وَتَفْرِيقًا بَيْنَ الْمُؤْمِنِينَ وَإِرْصَادًا لِّمَنْ حَارَبَ اللَّهَ وَرَسُولَهُ مِن قَبْلُ ۚ وَلَيَحْلِفُنَّ إِنْ أَرَدْنَا إِلَّا الْحُسْنَىٰ ۖ وَاللَّهُ يَشْهَدُ إِنَّهُمْ لَكَاذِبُونَ ﴿١٠٧﴾

107. තවද (ඉස්ලාම් ධර්මයට) හානි පමුණුවීමටත් අවිශ්වාසිත බවට (උදව් දීමට)ත් විශ්වාසීන් අතර බෙදීමක් ඇති කිරීමටත් අල්ලාහ්ට මෙන්ම ඔහුගේ දූතයාණන්ටද එරෙහිව කලින් සටන් වැදුණ තැනැත්තන්ට සැඟවී සිටීමටත් පිණිස නැමදුම් ස්ථානයක් තැනූ අය (වංචනිකයන් අතර) වෙති. 'අපි යහපත විනා අන් දෙයක් අදහස් නොකළෙමු.'යි නිසැකවම ඔවුහු දිවුරා කියන්නෝය. එහෙත් ඔවුන් නියතවශයෙන්ම මුසාවාදීන් බවට අල්ලාහ් සාක්ෂි දරයි.

لَا تَقُمْ فِيهِ أَبَدًا ۚ لَّمَسْجِدٌ أُسِّسَ عَلَى التَّقْوَىٰ مِنْ أَوَّلِ يَوْمٍ أَحَقُّ أَن تَقُومَ فِيهِ ۚ فِيهِ رِجَالٌ يُحِبُّونَ أَن يَتَطَهَّرُوا ۚ وَاللَّهُ يُحِبُّ الْمُطَّهِّرِينَ ﴿١٠٨﴾

108. (නැමදීම සඳහා) කිසිවිටෙක එහි නොසිටගන්න. මුල් දවසේ සිටම බිය බැතිමත් බවෙන් ගොඩනගනු ලැබූ නැමදුම් ස්ථානයක (නැමදීම සඳහා) සිටගැනීම ඔබට වඩාත් සුදුසු වේ. පවිත්‍රත්වයට කැමැත්තක් දක්වන මිනිසුන් එතුල සිටිති. පවිත්‍රත්වයට පත්වන්නන්ව අල්ලාහ් ප්‍රිය කරන්නේය.

أَفَمَنْ أَسَّسَ بُنْيَانَهُ عَلَىٰ تَقْوَىٰ مِنَ اللَّهِ وَرِضْوَانٍ خَيْرٌ أَم مَّنْ أَسَّسَ بُنْيَانَهُ عَلَىٰ شَفَا جُرُفٍ هَارٍ فَانْهَارَ بِهِ فِي نَارِ جَهَنَّمَ ۗ وَاللَّهُ لَا يَهْدِي الْقَوْمَ الظَّالِمِينَ ﴿١٠٩﴾

109. එහෙයින් වඩා යහපත් වන්නේ අල්ලාහ්ට බියබැතිමත් බවෙන් හා ඔහුගේ තෘප්තිය මත සිය අත්තිවාරම දැමූ තැනැත්තාද? නැතහොත් සෝදා ගිය දුර්වල ඉවුරක් අද්දර ඔහු සමඟම එය නිරාගින්නට කඩා වැටෙන සේ සිය අත්තිවාරම දැමූ තැනැත්තාද? සීමාව ඉක්මවා යන ජනතාවට අල්ලාහ් මග නොපෙන්වයි.

لَا يَزَالُ بُنْيَانُهُمُ الَّذِي بَنَوْا رِيبَةً فِي قُلُوبِهِمْ إِلَّا أَن تَقَطَّعَ قُلُوبُهُمْ ۚ

110. ඔවුන් ගොඩනැගූ ඔවුන්ගේ මෙම ගොඩනැගිල්ල ඔවුන්ගේ හදවත් කැබැලිවලට කැඩී යන තෙක් ඔවුන්ගේ හදවත්වලට

وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ﴿١١٠﴾ ع

නොසන්සුන්තාවය සහ සැකය ගෙනදෙන්නාවූ සදාකාලික හේතුවක් වෙයි. අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

اِنَّ اللّٰهَ اشْتَرٰى مِنَ الْمُؤْمِنِيْنَ اَنْفُسَهُمْ
وَاَمْوَالَهُمْ بِاَنَّ لَهُمُ الْجَنَّةَ ؕ
يُقَاتِلُوْنَ فِيْ سَبِيْلِ اللّٰهِ فَيَقْتُلُوْنَ
وَيُقْتَلُوْنَ وَعْدًا عَلَيْهِ حَقًّا فِي التَّوْرٰىةِ
وَالْاِنْجِيْلِ وَالْقُرْاٰنِ ؕ وَمَنْ اَوْفٰى بِعَهْدِهٖ
مِنَ اللّٰهِ فَاسْتَبْشِرُوْا بِبَيْعِكُمُ الَّذِيْ
بَايَعْتُمْ بِهٖ ؕ وَذٰلِكَ هُوَ الْفَوْزُ الْعَظِيْمُ ﴿١١١﴾

111. ඇත්තෙන්ම අල්ලාහ් විශ්වාසිතයින්ගෙන් ඔවුන්ගේ ජීවිත හා ඔවුන්ගේ දේපළ මිළට ගෙන ඇත්තේ ඒ වෙනුවෙන් ඔවුනට උද්‍යානය ලැබීම පිණිසය. ඔවුහු අල්ලාහ්ගේ මාර්ගයෙහි සටන් වදිති. තවද ඔවුහු ඝාතනය කරති. තවද ඝාතනය කරනු ලබති. තවද තව්රාත්හිද ඉන්ජීල්හිද කුර්ආන්හිද (සඳහන් මෙය ඔහු) තමා මතම ස්ථිර (කරගත්) ප්‍රතිඥාවකි. සිය පොරොන්දුව ඉටු කිරීමෙහිලා වඩාත් ශ්‍රේෂ්ඨ වන්නේ අල්ලාහ් හැර අන් කවරෙක්ද? එහෙයින් නුඹලා ඔහු සමඟ කළ නුඹලාගේ ගණුදෙනුව කෙරෙහි සතුටු වනු. තවද උත්තරීතර ජයග්‍රහණය එයම වේ.

اَلتَّآئِبُوْنَ الْعٰبِدُوْنَ الْحٰمِدُوْنَ السَّآئِحُوْنَ
الرّٰكِعُوْنَ السّٰجِدُوْنَ الْاٰمِرُوْنَ
بِالْمَعْرُوْفِ وَالنَّاهُوْنَ عَنِ الْمُنْكَرِ
وَالْحٰفِظُوْنَ لِحُدُوْدِ اللّٰهِ ؕ وَبَشِّرِ
الْمُؤْمِنِيْنَ ﴿١١٢﴾

112. පශ්චාත්තාපයෙන් (අල්ලාහ් වෙත) යළි හැරෙන්නන්ද, (ඔහුව) නමස්කාර කරන්නන්ද, (ඔහුව) ප්‍රශංසා කරන්නන්ද, (ඔහුගේ මාර්ගයේ) ගමනේ යෙදෙන්නන්ද, (ඔහුට) හිස නමන්නන්ද, නළල බිම තබා (නමස්කාරයෙහි) යෙදෙන්නන්ද, යහපත් දේ නියම කරමින් නපුර තහනම් කරන්නන්ද, එමෙන්ම අල්ලාහ් නියම කරන ලද සීමාවන් රකින්නන්ද ඔවුහුම වෙති. තවද විශ්වාස කරන්නන් හට ශුභාරංචිය දෙන්න.

مَا كَانَ لِلنَّبِيِّ وَالَّذِيْنَ اٰمَنُوْٓا اَنْ
يَّسْتَغْفِرُوْا لِلْمُشْرِكِيْنَ وَلَوْ كَانُوْٓا اُولِيْ
قُرْبٰى مِنْ بَعْدِ مَا تَبَيَّنَ لَهُمْ اَنَّهُمْ
اَصْحٰبُ الْجَحِيْمِ ﴿١١٣﴾

113. ප්‍රතිමා පුදන්නන් වෙනුවෙන් ඔවුන් නිරයේ ජනතාව බව පැහැදිලි වූවායින් පසු ඔවුන් නෑසියන් වූවද, (ඔවුන් සඳහා දෙවියන්ගෙන්) ක්ෂමාව ඉල්ලා සිටීම වක්තෘවරයාණන්ටද විශ්වාසිතයින්ටද අදාල නොවේ.

114. තවද, ඉබ්රාහීම්ගේ ක්ෂමාව ඉල්ලීම වූයේ සිය පියාණන් වෙනුවෙන්, ඔහු හෙතෙමට කළාවූ පොරොන්දුවක් නිසාවෙනි. නමුත් හෙතෙම අල්ලාහ්ට සතුරු වූ බව ඔහුට පැහැදිලි වූ විට ඔහු හෙතෙම හා සම්බන්ධකම් අත්හැරියේය. නියතවශයෙන්ම ඉබ්රාහීම් ඉතා කාරුණික හදවතක් ඇති (මෙන්ම) ඉවසිලිවන්ත අයෙක්ද විය.

وَمَا كَانَ اسْتِغْفَارُ اِبْرٰهِيْمَ لِاَبِيْهِ اِلَّا عَنْ مَّوْعِدَةٍ وَّعَدَهَآ اِيَّاهُ ۚ فَلَمَّا تَبَيَّنَ لَهٗٓ اَنَّهٗ عَدُوٌّ لِّلّٰهِ تَبَرَّاَ مِنْهُ ؕ اِنَّ اِبْرٰهِيْمَ لَاَوَّاهٌ حَلِيْمٌ ﴿١١٤﴾

115. තවද ඔහු ඔවුනට මග පෙන්වූවායින් පසු ඔවුන් වැළකී සිටිය යුත්තේ කුමකින්ද යන්න ඔහු ඔවුනට පැහැදිලි කරනතෙක් කිසිම ජනයාව නොමග යැවීම අල්ලාහ්ට උචිත නොවේ. සැබැවින්ම අල්ලාහ් සියළුදේ ඉතා මැනවින් දනී.

وَمَا كَانَ اللّٰهُ لِيُضِلَّ قَوْمًا ۢ بَعْدَ اِذْ هَدٰىهُمْ حَتّٰى يُبَيِّنَ لَهُمْ مَّا يَتَّقُوْنَ ؕ اِنَّ اللّٰهَ بِكُلِّ شَيْءٍ عَلِيْمٌ ﴿١١٥﴾

116. නියතවශයෙන්ම අහස් සහ පොළොවේ රාජධානිය අයත් වන්නේ අල්ලාහ්ටමය. ඔහු ජීවය දෙන්නේය, තවද මරණය පමුණුවන්නේය. තවද අල්ලාහ් හැරෙන්නට නුඹලාට මිතුරෙකු හෝ උදව්කරුවෙකු නොමැත.

اِنَّ اللّٰهَ لَهٗ مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ يُحْيٖ وَيُمِيْتُ ؕ وَمَا لَكُمْ مِّنْ دُوْنِ اللّٰهِ مِنْ وَّلِيٍّ وَّلَا نَصِيْرٍ ﴿١١٦﴾

117. වක්තෘවරයාණන්ටද, සංක්‍රමණිකයින් සහ උදව්කරුවන් වන ඔවුන්ගේ පිරිසකගේ හදවත් අවුල් වියවුල් වූවායින් පසු කටුක මොහොතේදී ඔහුව අනුගමනය කළවුන්ටද නියතවශයෙන්ම අල්ලාහ් දයාවෙන් යුතුව හැරුණේය. ඔහු නැවතත් දයාවෙන් යුතුව ඔවුන් වෙත හැරුණේය. සැබැවින්ම ඔහු ඔවුන් කෙරෙහි සානුකම්පිතය, පරම දයාබරය.

لَقَدْ تَّابَ اللّٰهُ عَلَى النَّبِيِّ وَالْمُهٰجِرِيْنَ وَالْاَنْصَارِ الَّذِيْنَ اتَّبَعُوْهُ فِيْ سَاعَةِ الْعُسْرَةِ مِنْ ۢ بَعْدِ مَا كَادَ يَزِيْغُ قُلُوْبُ فَرِيْقٍ مِّنْهُمْ ثُمَّ تَابَ عَلَيْهِمْ ؕ اِنَّهٗ بِهِمْ رَءُوْفٌ رَّحِيْمٌ ۙ﴿١١٧﴾

118. තවද කල් දමමින් (සිටි) එම තිදෙනාටද, (ඔහු දයාවෙන් යුතුව හැරුණේය.) පොළොව විශාල වුවද එය ඔවුනට ඉතා පටුව පෙනෙන්නට විය. ඔවුන්ගේ සිත්(ද) ඔවුන් කෙරෙහි සිර කරවන ලදී. ඔහු වෙතට හැර, අල්ලාහ් වෙතින් වෙනත් පිළිසරණක් නැතැයි ඔවුන් ඒත්තු ගත්හ. තවද

وَّعَلَى الثَّلٰثَةِ الَّذِيْنَ خُلِّفُوْا ؕ حَتّٰٓى اِذَا ضَاقَتْ عَلَيْهِمُ الْاَرْضُ بِمَا رَحُبَتْ وَضَاقَتْ عَلَيْهِمْ اَنْفُسُهُمْ وَظَنُّوْٓا اَنْ لَّا

مَلْجَاَ مِنَ اللّٰهِ اِلَّاۤ اِلَيْهِ ؕ ثُمَّ تَابَ عَلَيْهِمْ لِيَتُوْبُوْا ؕ اِنَّ اللّٰهَ هُوَ التَّوَّابُ الرَّحِيْمُ ﴿١١٨﴾

ඔවුන් (ඔහු වෙත) පශ්චාත්තාපව හැරෙනු පිණිස ඔහු ඔවුන් වෙත දයාවෙන් යුතුව හැරුණේය. නියතවශයෙන්ම අල්ලාහ් (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය, පරම දයාබරය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اتَّقُوا اللّٰهَ وَكُوْنُوْا مَعَ الصّٰدِقِيْنَ ﴿١١٩﴾

119. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහි බියවනු. එමෙන්ම සත්‍යවාදීන් සමඟ සිටිනු.

مَا كَانَ لِاَهْلِ الْمَدِيْنَةِ وَمَنْ حَوْلَهُمْ مِّنَ الْاَعْرَابِ اَنْ يَّتَخَلَّفُوْا عَنْ رَّسُوْلِ اللّٰهِ وَلَا يَرْغَبُوْا بِاَنْفُسِهِمْ عَنْ نَّفْسِهٖ ؕ ذٰلِكَ بِاَنَّهُمْ لَا يُصِيْبُهُمْ ظَمَاٌ وَّلَا نَصَبٌ وَّلَا مَخْمَصَةٌ فِيْ سَبِيْلِ اللّٰهِ وَلَا يَطَـُٔوْنَ مَوْطِئًا يَّغِيْظُ الْكُفَّارَ وَلَا يَنَالُوْنَ مِنْ عَدُوٍّ نَّيْلًا اِلَّا كُتِبَ لَهُمْ بِهٖ عَمَلٌ صَالِحٌ ؕ اِنَّ اللّٰهَ لَا يُضِيْعُ اَجْرَ الْمُحْسِنِيْنَ ﴿١٢٠﴾

120. අල්ලාහ්ගේ දූතයාව අත්හැර පිටුපා සිටීමද ඔහුගේ ජීවිතයට වඩා තමන්ගේ ජීවිතයට මුල්තැනදීමද මදිනාවෙහි ජනතාව මෙන්ම ඔවුන්වටා සිටි ගැමි අරාබි පිරිසට සුදුසු නොවීය. මක්නිසාදයත් අල්ලාහ්ගේ මාර්ගයෙහි ඔවුනට ඇතිවන පිපාසය, තෙහෙට්ටුව, කුසගින්න, යනාදී පීඩාවන්ටද එමෙන්ම අවිශ්වාසිතයින්ගේ කෝපයට ලක්වන මාර්ගයක ඔවුන් පා තැබීමටද සතුරන්ගෙන් ලැබෙන දුක් කම්කටොලු වෙනුවටද ඔවුනට යහපත් ක්‍රියාවන්ම සටහන් කරනු ලබන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් යහකම් කරන්නන්ගේ තිළිණය නිෂ්ඵල නොකරන්නේය.

وَلَا يُنْفِقُوْنَ نَفَقَةً صَغِيْرَةً وَّلَا كَبِيْرَةً وَّلَا يَقْطَعُوْنَ وَادِيًا اِلَّا كُتِبَ لَهُمْ لِيَجْزِيَهُمُ اللّٰهُ اَحْسَنَ مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿١٢١﴾

121. තවද ඔවුන් කරන සුළු හෝ විශාල වියදමත් ඔවුන් මිටියාවතක් තරණය කිරීමත් ඔවුන්ගේ ගිණුමට සටහන් නොකරනු ලබන දෙයක් නොමැත. මේ අනුව ඔවුන් කළදේ වෙනුවෙන් අල්ලාහ් ඔවුනට විශිෂ්ඨවූ තිළිණ පිරිනමනු ඇත.

وَمَا كَانَ الْمُؤْمِنُوْنَ لِيَنْفِرُوْا كَآفَّةً ؕ فَلَوْلَا نَفَرَ مِنْ كُلِّ فِرْقَةٍ مِّنْهُمْ طَآئِفَةٌ لِّيَتَفَقَّهُوْا فِي الدِّيْنِ وَلِيُنْذِرُوْا قَوْمَهُمْ اِذَا

122. විශ්වාසිතයින් සියල්ලන්ටම එකවර ඉදිරියට යෑමට හැකියාවක් නොමැත. ඔවුන්ගෙන් පිරිසක් ධර්මය ගැන වඩා හොඳ අවබෝධයක් ලැබීම පිණිසත් ඔවුන් වෙත ආපසු පැමිණ, පාපයන්ගෙන් වැලකී සිටීම සඳහා ඔවුනට අවවාද කිරීමට හැකිවනු

رَجَعُوٓا إِلَيْهِمْ لَعَلَّهُمْ يَحْذَرُونَ ﴿١٢٢﴾

පිණිසත් ඔවුන්ගේ සෑම සමාජයකින්ම පිරිසක් ඉදිරියට නොගියේ මන්ද?

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ قَٰتِلُوا۟ ٱلَّذِينَ يَلُونَكُم مِّنَ ٱلْكُفَّارِ وَلْيَجِدُوا۟ فِيكُمْ غِلْظَةً ۚ وَٱعْلَمُوٓا۟ أَنَّ ٱللَّهَ مَعَ ٱلْمُتَّقِينَ ﴿١٢٣﴾

123. එම්බල විශ්වාසිතයිනි! නුඹලාට සමීපව සිටින එවන් අවිශ්වාසිතයින් සමග සටන්කරනු. තවද ඔවුනට නුඹලාගේ දැඩි ස්ථිරසාර බව හැඟි යා යුතුය. තවද බියබැතිමතුන් සමඟ අල්ලාහ් සිටින බව දැනගනු.

وَإِذَا مَآ أُنزِلَتْ سُورَةٌ فَمِنْهُم مَّن يَقُولُ أَيُّكُمْ زَادَتْهُ هَٰذِهِۦٓ إِيمَٰنًا ۚ فَأَمَّا ٱلَّذِينَ ءَامَنُوا۟ فَزَادَتْهُمْ إِيمَٰنًا وَهُمْ يَسْتَبْشِرُونَ ﴿١٢٤﴾

124. තවද පරිච්ඡේදයක් (සූරතයක්) පහල කරන ලද සෑමවිටම 'මෙ(ම පරිච්ඡේද)ය නුඹලාගෙන් කවරෙකුට විශ්වාසයෙහි වැඩිකර ඇත්තේදැ?' යි ඔවුන්ගෙන් සමහරෙක් පවසති. නමුත් විශ්වාසිත අයගේ විශ්වාසය එමගින් වැඩි කර ඇත්තේය. තවද ඔවුහු සතුටු වෙති.

وَأَمَّا ٱلَّذِينَ فِى قُلُوبِهِم مَّرَضٌ فَزَادَتْهُمْ رِجْسًا إِلَىٰ رِجْسِهِمْ وَمَاتُوا۟ وَهُمْ كَٰفِرُونَ ﴿١٢٥﴾

125. එහෙත් සිත්හි ලෙඩක් ඇති අය ගත්කළ මෙය ඔවුන්ගේ (ඇති) අපවිත්‍රයට (තවත්) අපවිත්‍ර එකතු කරයි. තවද ඔවුන් අවිශ්වාසිතයින්ව සිටියදීම මිය යන්නෝය.

أَوَلَا يَرَوْنَ أَنَّهُمْ يُفْتَنُونَ فِى كُلِّ عَامٍ مَّرَّةً أَوْ مَرَّتَيْنِ ثُمَّ لَا يَتُوبُونَ وَلَا هُمْ يَذَّكَّرُونَ ﴿١٢٦﴾

126. සෑම වසරකට වරක් හෝ දෙවරක් ඔවුන්ව පිරික්සුමට ලක්කරන බව ඔවුන් නොදනිත්ද? එසේ වුවද ඔවුන් පාපොච්චාරණය නොකරන්නෝය. තවද ඔවුන් අනුශාසනා නොලබන්නෝය.

وَإِذَا مَآ أُنزِلَتْ سُورَةٌ نَّظَرَ بَعْضُهُمْ إِلَىٰ بَعْضٍ هَلْ يَرَىٰكُم مِّنْ أَحَدٍ ثُمَّ ٱنصَرَفُوا۟ ۚ صَرَفَ ٱللَّهُ قُلُوبَهُم بِأَنَّهُمْ

127. තවද පරිච්ඡේදයක් (සූරතයක්) පහළ කරනු ලබන සෑමවිටම, 'කවරෙකු හෝ නුඹලාව දකින්නේදැ?' යි (කියමින්) ඔවුන් එකිනෙකා දෙස බලති. අනතුරුව ඔවුන් පිටුපායන්නෝය. ඔවුන් අවබෝධ නොකරන ජනතාවක් බැවින්

قَوۡمٌ لَّا يَفۡقَهُونَ ١٢٧

අල්ලාහ් ඔවුන්ගේ හදවත් හරවා ඇත්තේය.

لَقَدۡ جَآءَكُمۡ رَسُولٌ مِّنۡ أَنفُسِكُمۡ عَزِيزٌ عَلَيۡهِ مَا عَنِتُّمۡ حَرِيصٌ عَلَيۡكُم بِٱلۡمُؤۡمِنِينَ رَءُوفٌ رَّحِيمٌ ١٢٨

128. සැබැවින්ම නුඹලා අතරින්ම නුඹලා වෙත දූතයෙකු පැමිණ ඇත. නුඹලා කරදරයට පත්වීම ඔහුට දුකක් ගෙන දෙන්නේය. (ඔහු) ඉතසිතින්ම නුඹලා (ගේ අභිවෘද්ධිය) වෙනුවෙන් කැමැත්තේය. (තවද) විශ්වාසිතයින් කෙරෙහි (ඔහු) සානුකම්පිතය, දයාබරය.

فَإِن تَوَلَّوۡاْ فَقُلۡ حَسۡبِيَ ٱللَّهُ لَآ إِلَٰهَ إِلَّا هُوَۖ عَلَيۡهِ تَوَكَّلۡتُۖ وَهُوَ رَبُّ ٱلۡعَرۡشِ ٱلۡعَظِيمِ ١٢٩

129. එහෙත් ඔවුන් පිටුපාන්නේ නම්, 'අල්ලාහ් මට ප්‍රමාණවත්ය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නොමැත. මම ඔහු කෙරෙහිම (මාගේ) විශ්වාසය තබමි. තවද ශ්‍රේෂ්ඨතම සිංහාසනයේ අධිපතියාණන් ඔහු යැ' යි පවසන්න.



යූනුස්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓرٰ ۚ تِلْكَ اٰيٰتُ الْكِتٰبِ الْحَكِيْمِ ۝٢

2. අලිෆ් ලාම් රා◆, මේවා ප්‍රඥාවෙන් සපිරුණු ග්‍රන්ථයේ වාක්‍යයන්ය.

اَكَانَ لِلنَّاسِ عَجَبًا اَنْ اَوْحَيْنَآ اِلٰى رَجُلٍ مِّنْهُمْ اَنْ اَنْذِرِ النَّاسَ وَبَشِّرِ الَّذِيْنَ اٰمَنُوْٓا اَنَّ لَهُمْ قَدَمَ صِدْقٍ عِنْدَ رَبِّهِمْ ۗ قَالَ الْكٰفِرُوْنَ اِنَّ هٰذَا لَسٰحِرٌ مُّبِيْنٌ ۝٣

3. 'මිනිස් වර්ගයාට අවවාද කරන්න. තවද විශ්වාසිතයින්ට ඔවුන්ගේ අධිපතියාණන් වෙත ඔවුනට සත්‍යයේ උසස් ස්ථානයක් ඇති බවට සුභාරංචියද දෙන්න'යි (පවසමින්) අප ඔවුන් අතුරින්වූ මිනිසෙකුට දේව අනාවරණය පහළ කිරීම ජනතාවට පුදුමයක් (වීමට කාරණයක්)ද? නියතවශයෙන්ම මොහු ප්‍රකට මායාකාරයෙකුයැ' යි අවිශ්වාසිතයින් කියති.

اِنَّ رَبَّكُمُ اللّٰهُ الَّذِىْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ فِىْ سِتَّةِ اَيَّامٍ ثُمَّ اسْتَوٰى عَلَى الْعَرْشِ يُدَبِّرُ الْاَمْرَ ۗ مَا مِنْ شَفِيْعٍ اِلَّا مِنْۢ بَعْدِ اِذْنِهٖ ۗ ذٰلِكُمُ اللّٰهُ رَبُّكُمْ فَاعْبُدُوْهُ ۗ اَفَلَا تَذَكَّرُوْنَ ۝٤

4. සැබැවින්ම අහස් සහ පොළොව කාලපරිච්ඡේද හයක් තුළ මැව්වේ නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ්ය. අනතුරුව ඔහු තමාව සිංහාසනය මත ස්ථාවර කර ගත්තේය. ඔහු සියල්ල හසුරුවන්නේය. ඔහුගේ අවසරයෙන් පසුව මිස (ඔහු සමග) මැදිහත්කරුවෙක් නොමැත. නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ් එවැන්නෙකුය. එබැවින් ඔහුව නමදිනු. එවිටත් නුඹලා අනුශාසනා නොලබන්නෙහුද?

اِلَيْهِ مَرْجِعُكُمْ جَمِيْعًا ۗ وَعْدَ اللّٰهِ حَقًّا ۗ اِنَّهٗ يَبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيْدُهٗ لِيَجْزِىَ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ بِالْقِسْطِ ۗ

5. නුඹලා සියල්ලන්ගේ ආපසු පැමිණීම ඔහු වෙතටමය. අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යවේ. නියතවශයෙන්ම ඔහු මැවීම උපදවන්නේය. පසුව විශ්වාසකොට යහපත් ක්‍රියා කරන්නන්හට සාධාරණව ඵලවිපාක ලබා දීම පිණිස

◆ මම අල්ලාහ්, සියල්ල දකින්නා වෙමි.

එය නැවත උත්පාදනය කරන්නේය. එමෙන්ම අවිශ්වාසිතයින් ගත්කළ ඔවුන් අවිශ්වාස කළ හේතුවෙන් ඔවුනට බිමට උතුරන්නාවූ ජලයද වේදනාකාරී දඬුවමක්ද ඇත.

وَالَّذِيْنَ كَفَرُوْا لَهُمْ شَرَابٌ مِّنْ حَمِيْمٍ وَّعَذَابٌ اَلِيْمٌۢ بِمَا كَانُوْا يَكْفُرُوْنَ ۝٥

6. සූර්යයා දීප්තිමත්වද චන්ද්‍රයා සෞම්‍යාලෝකවද නිර්මාණය කළේ ඔහුමය. තවද එයට අවධියන් නියම කළේ වර්ෂ ගණනද (කාලය) ගණන් ගැනීමද නුඹලා දැනගනු පිණිසය. අල්ලාහ් සත්‍යයක් ලෙසින් මිස මෙය නිර්මාණය නොකලේය. දැනුමැති ජනතාවට මෙම සලකුණු ඔහු පැහැදිලිව විස්තර කරන්නේය.

هُوَ الَّذِىْ جَعَلَ الشَّمْسَ ضِيَآءً وَّالْقَمَرَ نُوْرًا وَّقَدَّرَهٗ مَنَازِلَ لِتَعْلَمُوْا عَدَدَ السِّنِيْنَ وَالْحِسَابَ ۗ مَا خَلَقَ اللّٰهُ ذٰلِكَ اِلَّا بِالْحَقِّ ۚ يُفَصِّلُ الْاٰيٰتِ لِقَوْمٍ يَّعْلَمُوْنَ ۝٦

7. සැබැවින්ම රෑ හා දවාල මාරුවීමෙහිද, අහස් හා පොළොවෙහි අල්ලාහ් නිර්මාණය කර ඇති දැහිද (අල්ලාහ් කෙරෙහි) බිය බැතිමත් ජනතාවට සලකුණු ඇත.

اِنَّ فِىْ اخْتِلَافِ الَّيْلِ وَالنَّهَارِ وَمَا خَلَقَ اللّٰهُ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ لَاٰيٰتٍ لِّقَوْمٍ يَّتَّقُوْنَ ۝٧

8. අපව හමුවීම ගැන අපේක්ෂා නොකරමින් මෙලොව ජීවිතයෙන් තෘප්තිමත් වී එයින් සැනසීමට පත්වූ අයද එමෙන්ම අපගේ සළකුණු කෙරෙහි තැකීමක් නොකරන අයද,

اِنَّ الَّذِيْنَ لَا يَرْجُوْنَ لِقَآءَنَا وَرَضُوْا بِالْحَيٰوةِ الدُّنْيَا وَاطْمَاَنُّوْا بِهَا وَالَّذِيْنَ هُمْ عَنْ اٰيٰتِنَا غٰفِلُوْنَ ۝٨ۙ

9. මොවුන්මය, තමන් ඉපැයූ දේ නිසා මොවුන්ගේ වාසස්ථානය ගින්න වේ.

اُولٰٓئِكَ مَاْوٰىهُمُ النَّارُ بِمَا كَانُوْا يَكْسِبُوْنَ ۝٩

10. නියතවශයෙන්ම විශ්වාස කර යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන්ට ඔවුන්ගේ විශ්වාසය නිසා ඔවුන්ගේ අධිපතියාණන් ඔවුනට මග පෙන්වන්නේය. සෞභාග්‍යයෙන් යුත් උද්‍යානයන්හි ඔවුනට පහළින් ගංගා ගලාබසිනු ඇත.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ يَهْدِيْهِمْ رَبُّهُمْ بِاِيْمَانِهِمْ ۚ تَجْرِىْ مِنْ تَحْتِهِمُ الْاَنْهٰرُ فِىْ جَنّٰتِ النَّعِيْمِ ۝١٠

11. එහිදී ඔවුන්ගේ ප්‍රාර්ථනාව 'ඕ අල්ලාහ් ඔබ සුවිශුද්ධය' යන්නයි. තවද, එහිදී ඔවුන්ගේ සුබ පැතුම 'සාමය අත්වේවා!' යන්නයි. තවද ඔවුන්ගේ අවසාන ප්‍රාර්ථනාව 'සියළු ප්‍රශංසා සර්ව ලෝකයෙහි අධිපතියාණන් වන අල්ලාහ්ටය' යන්නයි.

دَعْوٰىهُمْ فِيْهَا سُبْحٰنَكَ اللّٰهُمَّ
وَتَحِيَّتُهُمْ فِيْهَا سَلٰمٌ ۚ وَاٰخِرُ دَعْوٰىهُمْ
اَنِ الْحَمْدُ لِلّٰهِ رَبِّ الْعٰلَمِيْنَ ۝١١

12. වස්තුව (රැස්කර ගැනීම)ට ඔවුන් කඩිනම් වන්නාසේ (ඔවුන් උපයාගත්) අකුසල් මිනිසුන්ට අල්ලාහ් කඩිනම් කරන්නේ නම් ඔවුන්ගේ (ජිවිතයේ අවසන්) කාලය මේ වනවිට ඔවුනට අත්වන්නට තිබිණ. එහෙත් අප හා හමුව ගැන අපේක්ෂා නොකරන්නන්ට ඔවුන්ගේ සීමාව ඉක්මවීමෙහි අයාලේ යාමට අප ඔවුනට ඉඩහරින්නෙමු.

وَلَوْ يُعَجِّلُ اللّٰهُ لِلنَّاسِ الشَّرَّ اسْتِعْجَالَهُمْ
بِالْخَيْرِ لَقُضِيَ اِلَيْهِمْ اَجَلُهُمْ ؕ فَنَذَرُ
الَّذِيْنَ لَا يَرْجُوْنَ لِقَآءَنَا فِيْ طُغْيَانِهِمْ
يَعْمَهُوْنَ ۝١٢

13. තවද මිනිසාට කරදරයක් අත්වනවිට, ඔහු පැත්තකට ඇලවෙමින් හෝ වාඩිවෙමින් හෝ සිටගනිමින් හෝ ඔහු අපව කැඳවයි. නමුත් අප ඔහුව ඔහුගේ විපතින් මුදවාගන්නාවිට ඔහුට අත්වූ දුකට කිසිසේත් අපව නොකැඳවා සිටියාසේ ඔහු යන්නේය. මෙයාකාරයට සීමාව ඉක්මවා යන්නන්ගේ ක්‍රියාවන් ඔවුන්ගේ ඇස්වලට අලංකාරව පෙනීමට සලස්වන ලදී.

وَاِذَا مَسَّ الْاِنْسَانَ الضُّرُّ دَعَانَا لِجَنْۢبِهٖۤ
اَوْ قَاعِدًا اَوْ قَآئِمًا ۚ فَلَمَّا كَشَفْنَا عَنْهُ
ضُرَّهٗ مَرَّ كَاَنْ لَّمْ يَدْعُنَاۤ اِلٰى ضُرٍّ مَّسَّهٗ ؕ
كَذٰلِكَ زُيِّنَ لِلْمُسْرِفِيْنَ مَا كَانُوْا
يَعْمَلُوْنَ ۝١٣

14. තවද නුඹලාට පෙර බොහෝ ජනසමූහයන්, ඔවුන්ගේ දූතයින් ඔවුන් වෙත පැහැදිලි සළකුණු සමඟ පැමිණියද, ඔවුන් සීමාව ඉක්මවූ විට අපි විනාශ කළෙමු. එහෙත් ඔවුන් විශ්වාස නොකළෝය. මෙලෙස වැරදිකාර ජනතාවට අපි ප්‍රතිවිපාක ලබාදෙන්නෙමු .

وَلَقَدْ اَهْلَكْنَا الْقُرُوْنَ مِنْ قَبْلِكُمْ لَمَّا
ظَلَمُوْا ۙ وَجَآءَتْهُمْ رُسُلُهُمْ بِالْبَيِّنٰتِ
وَمَا كَانُوْا لِيُؤْمِنُوْا ؕ كَذٰلِكَ نَجْزِى
الْقَوْمَ الْمُجْرِمِيْنَ ۝١٤

15. පසුව නුඹලා කෙසේ කටයුතු කරන්නේදැයි අප දැකගැනීම සඳහා ඔවුන්ට පසු අපි පොළොවෙහි

ثُمَّ جَعَلْنٰكُمْ خَلٰٓئِفَ فِى الْاَرْضِ مِنْۢ

بَعۡدِهِمۡ لِنَنۡظُرَ كَيۡفَ تَعۡمَلُوۡنَ ﴿١٥﴾

නුඹලාව (ඔවුන්ගේ) නියෝජිතයින් කළෙමු.

وَاِذَا تُتۡلٰى عَلَيۡهِمۡ اٰيَاتُنَا بَيِّنٰتٍ ۙ قَالَ الَّذِيۡنَ لَا يَرۡجُوۡنَ لِقَآءَنَا ائۡتِ بِقُرۡاٰنٍ غَيۡرِ هٰذَاۤ اَوۡ بَدِّلۡهُ ؕ قُلۡ مَا يَكُوۡنُ لِىۡۤ اَنۡ اُبَدِّلَهٗ مِنۡ تِلۡقَآئِ نَفۡسِىۡ ۚ اِنۡ اَتَّبِعُ اِلَّا مَا يُوۡحٰۤى اِلَىَّ ۚ اِنِّىۡۤ اَخَافُ اِنۡ عَصَيۡتُ رَبِّىۡ عَذَابَ يَوۡمٍ عَظِيۡمٍ ﴿١٦﴾

16. තවද අපගේ පැහැදිලි සළකුණු ඔවුන් වෙත පාරායණා කරනු ලැබූ විට අප හා හමුව ගැන අපේක්ෂා නොකරන්නෝ 'මෙය හැරෙන්නට වෙනත් කුර්ආනයක් ගෙන එන්න. නැතහොත් එය වෙනස් කරන්නැ'යි කියති. එයට 'මාගේ කැමැත්තෙන් වෙනස් කරන්නට මාහට අයිතියක් නැත. මාවෙත අණාවරණය කරන ලද දේ පමණක් මා අනුගමනය කරමි. මාගේ අධිපතියාණන්ට මා අවනත නොවුවහොත් මහත්වූ දිනයේ දඬුවමක් ගැන ඇත්තෙන්ම මම බිය වෙමි' යි පවසන්න.

قُلۡ لَّوۡ شَآءَ اللّٰهُ مَا تَلَوۡتُهٗ عَلَيۡكُمۡ وَلَاۤ اَدۡرٰٮكُمۡ بِهٖ ۖ فَقَدۡ لَبِثۡتُ فِيۡكُمۡ عُمُرًا مِّنۡ قَبۡلِهٖ ؕ اَفَلَا تَعۡقِلُوۡنَ ﴿١٧﴾

17. පවසන්න, 'අල්ලාහ් අභිමත කළේ නම්, මා එය නුඹලාට පාරායණය නොකරන්නට තිබුණි. ඔහු එය නුඹලාට දැනගැනීමට සලස්වන්නටද නොතිබුණි. ඇත්තෙන්ම මීට කළින්ද මම නුඹලා අතර (දිගු) ජිවිත කාලයක් ගතකර ඇත්තෙමි. එවිටත් නුඹලා තේරුම් නොගන්නේද?'

فَمَنۡ اَظۡلَمُ مِمَّنِ افۡتَرٰى عَلَى اللّٰهِ كَذِبًا اَوۡ كَذَّبَ بِاٰيٰتِهٖ ؕ اِنَّهٗ لَا يُفۡلِحُ الۡمُجۡرِمُوۡنَ ﴿١٨﴾

18. අල්ලාහ්ට එරෙහිව බොරුවක් ගොතන්නාට හෝ ඔහුගේ සලකුණු බොරුවක් සේ සලකන්නාට වඩා නොහික්මුණුව යුක්තිය කඩ කරන්නා කවරෙක්ද? නියතවශයෙන්ම වරදකරුවන් ජය නොගන්නෝය.

وَيَعۡبُدُوۡنَ مِنۡ دُوۡنِ اللّٰهِ مَا لَا يَضُرُّهُمۡ وَلَا يَنۡفَعُهُمۡ وَيَقُوۡلُوۡنَ هٰٓؤُلَۤاءِ شُفَعَآؤُنَا عِنۡدَ اللّٰهِ ؕ قُلۡ اَتُنَبِّـُٔوۡنَ اللّٰهَ بِمَا لَا يَعۡلَمُ فِى السَّمٰوٰتِ وَلَا فِى الۡاَرۡضِ ؕ سُبۡحٰنَهٗ وَتَعٰلٰى عَمَّا يُشۡرِكُوۡنَ ﴿١٩﴾

19. තවද ඔවුහු අල්ලාහ් වෙනුවට, ඔවුනට විපතක් ගෙන නොදෙන්නාවූද ඔවුනට ලාභයක් ගෙන නොදෙන්නාවූද දෙයට ඔවුහු නමදින්නෝය. තවද 'මේ අය අල්ලාහ් වෙත අපගේ මැදිහත්කරුවන්යැ'යි ඔවුහු කියති. පවසන්න, 'අහස්හි හා පොළොවෙහි ඔහු නොදන්නා ඇතැම් දේ පිළිබඳව නුඹලා අල්ලාහ්ට දැනුම්දෙන්නෙහු ද?'. ඔහු සුවිශුද්ධය. එමෙන්ම ඔවුන් (ඔහුට) සමාන තබන දේට වඩා (ඔහු) අති උසස්ය.

20. තවද මනුෂ්‍යයෝ එකම සමූහයක් මිස නොවූහ. පසුව ඔවුහු භේද වූහ. තවද ඔබගේ අධිපතියාණන් වෙතින් පෙර දුන් වචනයක් නිසා නොවූයේ නම් ඔවුන් එහි භේදවූ දේ පිළිබඳව ඔවුනතර දෙවය නියම වන්නට තිබුණි.

وَمَا كَانَ النَّاسُ إِلَّا أُمَّةً وَاحِدَةً
فَاخْتَلَفُوا ۚ وَلَوْلَا كَلِمَةٌ سَبَقَتْ مِنْ
رَبِّكَ لَقُضِيَ بَيْنَهُمْ فِيمَا فِيهِ يَخْتَلِفُونَ ٢٠

21. තවද ඔවුහු 'ඔහුගේ අධිපතියාණන් වෙතින් ඔහුට සලකුණක් පහළ නොකරනු ලැබුවේ කුමක් හෙයින්ද,?'යි කියති. පවසන්න, 'ගුප්තදේ අල්ලාහ්ටමය. එබැවින් බලා සිටිනු. මමද නුඹලා සමග බලාසිටින්නන් අතර වෙමි.'

وَيَقُولُونَ لَوْلَا أُنْزِلَ عَلَيْهِ آيَةٌ مِنْ
رَبِّهِ ۖ فَقُلْ إِنَّمَا الْغَيْبُ لِلَّهِ فَانْتَظِرُوا ۚ
إِنِّي مَعَكُمْ مِنَ الْمُنْتَظِرِينَ ٢١

22. විපතට හසුවූ ජනතාවකට අප දයාවේ සුවය දෙන එම මොහොතේ ඔවුහු අපගේ සලකුණු වලට එරෙහිව එසැණින්ම කුමන්ත්‍රණය කිරීමට පටන් ගනිති. පවසන්න, 'සැලසුම් කිරීමේදී අල්ලාහ් වඩා සීඝ්‍රය'. නියතවශයෙන්ම අපගේ (සුර) දූතයෝ නුඹලා සැලසුම් කරන දේ සටහන්කර ගනිති.

وَإِذَا أَذَقْنَا النَّاسَ رَحْمَةً مِنْ بَعْدِ ضَرَّاءَ
مَسَّتْهُمْ إِذَا لَهُمْ مَكْرٌ فِي آيَاتِنَا ۚ قُلِ اللَّهُ
أَسْرَعُ مَكْرًا ۚ إِنَّ رُسُلَنَا يَكْتُبُونَ مَا
تَمْكُرُونَ ٢٢

23. නුඹලාව ගොඩබිමෙනුත් මුහුදෙනුත් ගමන් කිරීමට සලස්වන්නේ ඔහුමය. යම්තාක් නුඹලා නැව්හි සිටින කල්හි මඳ සුළඟින් ඔවුන් සමග යාත්‍රා කර ඔවුන් එයින් ප්‍රමෝදයට පත්වන විට දරුණු සුළඟකින් ඒවා හසුකර ගෙන සැමදෙසින්ම (මුහුදු) රැළි ඔවුන් වෙත පැමිණේ. තවද තමන්ව වටලා ගනුලැබූ බව ඔවුන් සිතන්නෝය. (එවිට) ඔවුහු 'ඔබ අපව මෙයින් මුදවා ගන්නේ නම් අපි නියතවශයෙන්ම කෘතඥවන්නන්ගෙන් වන්නෙමු.'යි (පවසමින්) ඔහුට අවංක විශ්වාසය පොරොන්දු වෙමින් ඔවුන් අල්ලාහ්ව කැඳවන්නෝය.

هُوَ الَّذِي يُسَيِّرُكُمْ فِي الْبَرِّ وَالْبَحْرِ ۖ
حَتَّىٰ إِذَا كُنْتُمْ فِي الْفُلْكِ وَجَرَيْنَ بِهِمْ
بِرِيحٍ طَيِّبَةٍ وَفَرِحُوا بِهَا جَاءَتْهَا رِيحٌ
عَاصِفٌ وَجَاءَهُمُ الْمَوْجُ مِنْ كُلِّ
مَكَانٍ وَظَنُّوا أَنَّهُمْ أُحِيطَ بِهِمْ ۙ دَعَوُا
اللَّهَ مُخْلِصِينَ لَهُ الدِّينَ لَئِنْ أَنْجَيْتَنَا
مِنْ هَٰذِهِ لَنَكُونَنَّ مِنَ الشَّاكِرِينَ ٢٣

24. එහෙත් ඔහු ඔවුන්ව මුදවා ගත්විට, බලනු! ඔවුහු වැරදි සහගතව පොළොවෙහි සීමාව ඉක්මවා ක්‍රියා කරන්නට පටන් ගනිති.

فَلَمَّا أَنْجَاهُمْ إِذَا هُمْ يَبْغُونَ فِي الْأَرْضِ
بِغَيْرِ الْحَقِّ ۗ يَا أَيُّهَا النَّاسُ إِنَّمَا بَغْيُكُمْ

عَلٰٓى اَنْفُسِكُمْ ۙ مَّتَاعَ الْحَيٰوةِ الدُّنْيَا ۫ ثُمَّ اِلَيْنَا مَرْجِعُكُمْ فَنُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ تَعْمَلُوْنَ ٢٤

එම්බල මිනිසුනි, නුඹලාගේ සීමාව ඉක්මවීම් නුඹලාටම එරෙහිවන්නේය. මෙලොව ජීවිතය හුදෙක් තාවකාලික භුක්ති විඳීමකි. ඉක්බිතිව නුඹලාගේ ආපසු පැමිණීම අප වෙත වන්නේය. තවද නුඹලා කරමින් සිටි දේ පිළිබඳව අපි නුඹලාට දන්වන්නෙමු.

اِنَّمَا مَثَلُ الْحَيٰوةِ الدُّنْيَا كَمَآءٍ اَنْزَلْنٰهُ مِنَ السَّمَآءِ فَاخْتَلَطَ بِهٖ نَبَاتُ الْاَرْضِ مِمَّا يَاْكُلُ النَّاسُ وَالْاَنْعَامُ ؕ حَتّٰٓى اِذَآ اَخَذَتِ الْاَرْضُ زُخْرُفَهَا وَازَّيَّنَتْ وَظَنَّ اَهْلُهَآ اَنَّهُمْ قٰدِرُوْنَ عَلَيْهَآ ۙ اَتٰهَآ اَمْرُنَا لَيْلًا اَوْ نَهَارًا فَجَعَلْنٰهَا حَصِيْدًا كَاَنْ لَّمْ تَغْنَ بِالْاَمْسِ ؕ كَذٰلِكَ نُفَصِّلُ الْاٰيٰتِ لِقَوْمٍ يَّتَفَكَّرُوْنَ ٢٥

25. මෙලොව ජීවිතයේ උදාහරණය අප අහසින් පහළවීමට සලස්වන්නාවූ ජලය බඳුය. අනතුරුව මනුෂ්‍යයින්ද ගවයින්ද අනුභව කරන්නාවූ පොළොවෙහි වැවිලි ඒ හා මිශ්‍ර වේ. පොළොව අලංකාරභාවයෙන් මල් ඵල දරමින් සරුසාර වන තුරු මෙය පවතී. පසුව එහි හිමිකරුවන් එය මත ඔවුන් අධිපතීන් බව සිතති. පසුව රැයෙහි හෝ දවාලෙහි ක්ෂණිකව අපගේ නියෝගය පහළවේ. පසුව එය පෙරදින නොතිබුනාක් මෙන් වනසා දමනු ලැබූ වගාබිමක් ලෙසට අපි පත්කරන්නෙමු. මෙනෙහි කරන ජනතාවක් වෙනුවෙන් අපගේ සලකුණු අප පැහැදිලි කරන්නේ මෙලෙසය.

وَاللّٰهُ يَدْعُوْٓا اِلٰى دَارِ السَّلٰمِ ؕ وَيَهْدِيْ مَنْ يَّشَآءُ اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ٢٦

26. තවද අල්ලාහ් සාමයේ වාසස්ථානය වෙතට කැඳවයි. තවද ඔහු කැමති අයට ඍජුමාර්ගය වෙත මග පෙන්වයි.

لِلَّذِيْنَ اَحْسَنُوا الْحُسْنٰى وَزِيَادَةٌ ؕ وَلَا يَرْهَقُ وُجُوْهَهُمْ قَتَرٌ وَّلَا ذِلَّةٌ ؕ اُولٰٓئِكَ اَصْحٰبُ الْجَنَّةِ ۚ هُمْ فِيْهَا خٰلِدُوْنَ ٢٧

27. යහපත් ක්‍රියාවන් කරන්නන්ට ඉතා හොඳ (තිළිණය)ද (ආශිර්වාදයන්) වැඩියෙන්ද අත්වන්නේය. තවද අන්ධකාරය හෝ අවමානය ඔවුන්ගේ මුහුණු වසා නොගන්නේය. ස්වර්ගයේ වෙසෙන්නෝ මොවුහු වෙති. මොවුහු එහිම වෙසෙන්නෝය.

وَالَّذِيْنَ كَسَبُوا السَّيِّاٰتِ جَزَآءُ سَيِّئَةٍۭ بِمِثْلِهَا ۙ وَتَرْهَقُهُمْ ذِلَّةٌ ؕ مَا لَهُمْ مِّنَ

28. එමෙන්ම පාපක්‍රියා කරන අය ගත්කල ඔවුනට ඒ ආකාරයේ පාපයේ දඬුවම අත් වන්නේය. අවමානය ඔවුන් වෙලා ගන්නේය. අල්ලාහ්ගෙන් ඔවුන්ව ආරක්ෂා කිරීමට කිසිවෙක්

اللّٰهِ مِنْ عَاصِمٍ ۚ كَاَنَّمَآ اُغْشِيَتْ وُجُوْهُهُمْ قِطَعًا مِّنَ الَّيْلِ مُظْلِمًا ۗ اُولٰٓئِكَ اَصْحٰبُ النَّارِ ۚ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿٢٨﴾

නොවන්නේය. (තවද) ඔවුන් ගේ මුහුණු රාත්‍රියේ අඳුරු පැල්ලම් වලින් වැසී තිබුණාසේ (ඔවුන් පෙනෙන්නෝ)ය. නිරයේ වැසියෝ මොවුහු වෙති. මොවුහු එහිම වෙසෙන්නෝය.

وَيَوْمَ نَحْشُرُهُمْ جَمِيْعًا ثُمَّ نَقُوْلُ لِلَّذِيْنَ اَشْرَكُوْا مَكَانَكُمْ اَنْتُمْ وَشُرَكَآؤُكُمْ ۚ فَزَيَّلْنَا بَيْنَهُمْ وَقَالَ شُرَكَآؤُهُمْ مَّا كُنْتُمْ اِيَّانَا تَعْبُدُوْنَ ﴿٢٩﴾

29. ඔවුන් සියල්ලන්වම අප එක්රැස් කරන්නාවූ දිනයේ ප්‍රවේසම් වනු. එවිට (අල්ලාහ්ට) සමාන තැබූ අය වෙත 'නුඹලා සහ නුඹලාගේ සමාන තබන දෙවියන් නුඹලාගේ තැන්වලම සිටිනු'යි අපි කියන්නෙමු. අනතුරුව අපි ඔවුන්ව වෙන් කරන්නෙමු. තවද ඔවුන් විසින් සමාන තබන ලද අය 'නුඹලා අපට නැමදුම් නොකළේ' යැයි පවසන්නෝය.

فَكَفٰى بِاللّٰهِ شَهِيْدًاۢ بَيْنَنَا وَبَيْنَكُمْ اِنْ كُنَّا عَنْ عِبَادَتِكُمْ لَغٰفِلِيْنَ ﴿٣٠﴾

30. 'එබැවින් නුඹලා සහ අප අතර අල්ලාහ් ප්‍රමාණවත් සාක්ෂිකරුවෙකු වේ. නුඹලාගේ කැපවීම ගැන සම්පූර්ණයෙන්ම අපි නොදැන සිටියෙමු.'

هُنَالِكَ تَبْلُوْا كُلُّ نَفْسٍ مَّآ اَسْلَفَتْ وَرُدُّوْٓا اِلَى اللّٰهِ مَوْلٰىهُمُ الْحَقِّ وَضَلَّ عَنْهُمْ مَّا كَانُوْا يَفْتَرُوْنَ ﴿٣١﴾ ع

31. සෑම ආත්මයක්ම තමන් පෙර එවා ඇතිදේ කුමක්ද යන්න එහිදී වටහාගනු ඇත. එමෙන්ම ඔවුන්ගේ සැබෑ අධිපතියා වන අල්ලාහ් වෙත ඔවුන් ආපසු කැඳවනු ලබන්නෝය. තවද ඔවුන් ගොතමින් සිටි සියළුදේ ඔවුන්ට අහිමිවනු ඇත.

قُلْ مَنْ يَّرْزُقُكُمْ مِّنَ السَّمَآءِ وَالْاَرْضِ اَمَّنْ يَّمْلِكُ السَّمْعَ وَالْاَبْصَارَ وَمَنْ يُّخْرِجُ الْحَيَّ مِنَ الْمَيِّتِ وَيُخْرِجُ الْمَيِّتَ مِنَ الْحَيِّ وَمَنْ يُّدَبِّرُ الْاَمْرَ ۗ فَسَيَقُوْلُوْنَ اللّٰهُ ۚ فَقُلْ اَفَلَا تَتَّقُوْنَ ﴿٣٢﴾

32. පවසන්න, 'අහසින් සහ පොළොවෙන් නුඹලාට ජීවනෝපාය සපයන්නේ කවරෙක්ද? නැත්නම් කන් සහ ඇස් මත බලය ඇත්තා කවරෙක්ද? තවද මළවුන්ගෙන් ජීවයන් හෙළි කරන්නෙත් ජීවයන්ගෙන් මළවුන් හෙළි කරන්නෙත් කවරෙක්ද? තවද සියළු කටයුතු පාලනය කරන්නේ කවරෙක්ද?'. 'අල්ලාහ්' යැයි ඔවුහු කියන්නෝය. එසේනම් පවසන්න, 'නුඹලා මින්පසුවත් (නුඹලාගේ වැරදි පිළිවෙත්වලින්) වැළකෙන්නෙ නැද්ද?'.

33. නුඹලාගේ සත්‍ය අධිපතියාණන් වන අල්ලාහ් එවැන්නෙකුය. එබැවින් සත්‍යයෙන් පසු ඉතුරුවන්නේ පැහැදිලි වරද මිස කුමක්ද? එසේනම් නුඹලා (සත්‍යයෙන්) ඉවත හරවනු ලබන්නේ කෙසේද?

فَذٰلِكُمُ اللّٰهُ رَبُّكُمُ الْحَقُّ ۚ فَمَاذَا بَعْدَ الْحَقِّ اِلَّا الضَّلٰلُ ۚ فَاَنّٰى تُصْرَفُوْنَ ﴿٣٣﴾

34. කැරලිගසන අය විශ්වාස නොකරන බවට ඔබගේ අධිපතියාණන්ගේ වචනය ඔවුනට එරෙහිව සත්‍ය වූයේ මෙලෙසය.

كَذٰلِكَ حَقَّتْ كَلِمَتُ رَبِّكَ عَلَى الَّذِيْنَ فَسَقُوْٓا اَنَّهُمْ لَا يُؤْمِنُوْنَ ﴿٣٤﴾

35. පවසන්න, 'මැවීම් උපදවන්නා වූද පසුව එය නැවතත් කරන්නාවූද කෙනෙක් නුඹලාගේ සමාන තබන්නන් අතර සිටිත්ද?'. පවසන්න, 'මැවීම් ආරම්භ කරන්නේත් පසුව එය නැවත කරන්නේත් අල්ලාහ් (පමණක්)මය. එසේනම් නුඹලා නොමග යවනු ලබන්නේ කෙසේද?'.

قُلْ هَلْ مِنْ شُرَكَآئِكُمْ مَّنْ يَّبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيْدُهٗ ۗ قُلِ اللّٰهُ يَبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيْدُهٗ فَاَنّٰى تُؤْفَكُوْنَ ﴿٣٥﴾

36. පවසන්න, 'නුඹලාගේ සමාන තබන දෙවිවරුන්ගෙන් සත්‍යය වෙත මගපෙන්වන කිසිවෙක් සිටිත්ද?'. පවසන්න, 'සත්‍යය වෙත මග පෙන්වන්නේ අල්ලාහ්මය. එබැවින් අනුගමනය කිරීමට වඩා සුදුස්සා වන්නේ සත්‍ය වෙත මග පෙන්වන්නා ද, නැතහොත් මග පෙන්වනු ලැබුවොත් මිස (තමන්ටම) මග සොයාගැනීමට නොහැකි අයෙකුද? එසේනම් නුඹලාට සිදුවී ඇත්තේ කුමක්ද? නුඹලා කෙසේ තීන්දු කරන්නේද?'.

قُلْ هَلْ مِنْ شُرَكَآئِكُمْ مَّنْ يَّهْدِيْٓ اِلَى الْحَقِّ ۗ قُلِ اللّٰهُ يَهْدِيْ لِلْحَقِّ ۗ اَفَمَنْ يَّهْدِيْٓ اِلَى الْحَقِّ اَحَقُّ اَنْ يُّتَّبَعَ اَمَّنْ لَّا يَهِدِّيْٓ اِلَّآ اَنْ يُّهْدٰى ۚ فَمَا لَكُمْ ۟ كَيْفَ تَحْكُمُوْنَ ﴿٣٦﴾

37. තවද ඔවුන්ගෙන් බොහෝ අය අනුමානය මිස අන් කිසිවක් අනුගමනය නොකරති. නියතවශයෙන්ම අනුමානය සත්‍යයට කිසිසේත් ආදේශ කළ නොහැක. සැබැවින්ම ඔවුන් කරන දේ ගැන අල්ලාහ් ඉතා හොඳින් දන්නේය.

وَمَا يَتَّبِعُ اَكْثَرُهُمْ اِلَّا ظَنًّا ۗ اِنَّ الظَّنَّ لَا يُغْنِيْ مِنَ الْحَقِّ شَيْـًٔا ۗ اِنَّ اللّٰهَ عَلِيْمٌۢ بِمَا يَفْعَلُوْنَ ﴿٣٧﴾

38. තවද මෙම කුර්ආනය අල්ලාහ් හැර අන් කිසිවෙකු විසින් බොරුවට තනන ලද දෙයක් නොවේ. එසේනොව මෙය මෙයට පෙර

وَمَا كَانَ هٰذَا الْقُرْاٰنُ اَنْ يُّفْتَرٰى مِنْ دُوْنِ اللّٰهِ وَلٰكِنْ تَصْدِيْقَ الَّذِيْ بَيْنَ

ඇතිදේ පරිපූර්ණ කරන අතර (දේව) නීතියේ විවරණයක්ද වේ. මෙය පිළිබඳව සැකයක් නැත. (මෙය සර්ව) ලෝකයන්හි අධිපතියාණන් වෙතින්ය.

يَدَيْهِ وَتَفْصِيلَ الْكِتَابِ لَا رَيْبَ فِيهِ مِن رَّبِّ الْعَالَمِينَ ﴿٣٨﴾

39. 'ඔහු එය බොරුවට ගොතා ඇත්තේයැ'යි ඔවුහු කියත්ද? පවසන්න, 'එසේනම් එවැනි පරිච්ඡේදයක් (සූරතයක්) ගෙන එනු, තවද නුඹලා සත්‍යවාදීන් වේ නම් අල්ලාහ් හැර උදව් සඳහා නුඹලාට හැකි සියල්ලන්ව කැඳවනු'.

أَمْ يَقُولُونَ افْتَرَاهُ ۖ قُلْ فَأْتُوا بِسُورَةٍ مِّثْلِهِ وَادْعُوا مَنِ اسْتَطَعْتُم مِّن دُونِ اللَّهِ إِن كُنتُمْ صَادِقِينَ ﴿٣٩﴾

40. නොඑසේය, ඔවුන් වටහා නොගත් දැනුමද, තවමත් ඔවුන් වෙත නොපැමිණි (සැබෑ) අර්ථයද, ඔවුන් ප්‍රතික්ෂේප කළහ. මේ ආකාරයටම ඔවුනට පෙර සිටියවුන්ද (සත්‍යය) ප්‍රතික්ෂේප කළහ. එහෙත් වැරදි කළවුන්ගේ අවසානය කුමක්වූයේ දැයි බලන්න !

بَلْ كَذَّبُوا بِمَا لَمْ يُحِيطُوا بِعِلْمِهِ وَلَمَّا يَأْتِهِمْ تَأْوِيلُهُ ۚ كَذَٰلِكَ كَذَّبَ الَّذِينَ مِن قَبْلِهِمْ ۖ فَانظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الظَّالِمِينَ ﴿٤٠﴾

41. තවද ඒ කෙරෙහි විශ්වාස කරන (සමහර) අය ඔවුන්ගෙන් වෙති. තවද ඒ කෙරෙහි විශ්වාස නොකරන (අනෙක්) අයද ඔවුන්ගෙන් වෙති. තවද කෝලාහලයට පොළඹවන්නන් පිළිබඳව ඔබගේ අධිපතියාණන් මැනැවින් දනියි.

وَمِنْهُم مَّن يُؤْمِنُ بِهِ وَمِنْهُم مَّن لَّا يُؤْمِنُ بِهِ ۚ وَرَبُّكَ أَعْلَمُ بِالْمُفْسِدِينَ ﴿٤١﴾

42. තවද ඔවුන් ඔබට බොරු චෝදනා කරන්නේ නම්, 'මාගේ ක්‍රියාව (ගැන) වගකීම මට වන අතර නුඹලාගේ ක්‍රියාව නුඹලාටමය. මා කරන දෙයට නුඹලා වගකිව යුතු නොවේ. තවද නුඹලා කරන දෙයට මා වගකිව යුතු නැතැ'යි පවසන්න.

وَإِن كَذَّبُوكَ فَقُل لِّي عَمَلِي وَلَكُمْ عَمَلُكُمْ ۖ أَنتُم بَرِيئُونَ مِمَّا أَعْمَلُ وَأَنَا بَرِيءٌ مِّمَّا تَعْمَلُونَ ﴿٤٢﴾

43. තවද ඔවුන් අතර ඔබට සවන් දෙන (සමහර) අය වෙති. බිහිරන්ට ඇසීමට සැලැස්වීමට ඔබට හැකිවන්නේද? ඔවුන් වටහා නොගෙන සිටියදීත්.

وَمِنْهُم مَّن يَسْتَمِعُونَ إِلَيْكَ ۚ أَفَأَنتَ تُسْمِعُ الصُّمَّ وَلَوْ كَانُوا لَا يَعْقِلُونَ ﴿٤٣﴾

44. තවද ඔවුන් අතර ඔබ දෙස

وَمِنْهُم مَّن يَنظُرُ إِلَيْكَ ۚ أَفَأَنتَ

බලන (සමහර) අය වෙති. අන්ධයින්ට මගපෙන්වීමට ඔබට හැකිවන්නේද? ඔවුන්ට දැක්මක් නොතිබියදීත්.

تَهْدِى الْعُمْىَ وَلَوْ كَانُوْا لَا يُبْصِرُوْنَ ﴿٤٤﴾

45. සැබැවින්ම අල්ලාහ් මිනිසුන්ට කිසිසේත්ම අසාධාරණ නොකරයි. නමුත් මිනිසුන් තමතමන්ටම වැරදිකර ගනිති.

اِنَّ اللّٰهَ لَا يَظْلِمُ النَّاسَ شَيْـًٔا وَّلٰـكِنَّ النَّاسَ اَنْفُسَهُمْ يَظْلِمُوْنَ ﴿٤٥﴾

46. තවද ඔහු ඔවුන්ව එක්රැස් කරන්නාවූ දිනයේදී ඔවුන් මෙලොවෙහි දවසකින් එක් හෝරාවකට වඩා තමන් මෙලොව ගතකර නොමැතිසේ (ඔවුනට පෙනියනු ඇත) ඔවුහු එකිනෙකා හඳුනා ගන්නෝය. අල්ලාහ්ව හමුවීම ප්‍රතික්ෂේප කරන අය ඇත්තවශයෙන්ම පාඩුවිඳින්නන් වන අතර ඔවුන් මගපෙන්වනු නොලබන්නෝය.

وَيَوْمَ يَحْشُرُهُمْ كَاَنْ لَّمْ يَلْبَثُوْۤا اِلَّا سَاعَةً مِّنَ النَّهَارِ يَتَعَارَفُوْنَ بَيْنَهُمْ ؕ قَدْ خَسِرَ الَّذِيْنَ كَذَّبُوْا بِلِقَآءِ اللّٰهِ وَمَا كَانُوْا مُهْتَدِيْنَ ﴿٤٦﴾

47. තවද අප ඔවුනට පොරොන්දු වූ දෙයකින් කොටසකට ඔබව අප සාක්ෂි දැරීමට සැලැස්වුයේ නම් නැතහොත් (ඊට පෙර) අප ඔබව මරණයට පත්කළේ නම් ඔවුන්ගේ ආපසු පැමිණීම අප වෙතමය. එවිට අල්ලාහ් ඔවුන් කරන දෙයට එරෙහිව සාක්ෂි දරයි.

وَاِمَّا نُرِيَنَّكَ بَعْضَ الَّذِىْ نَعِدُهُمْ اَوْ نَتَوَفَّيَنَّكَ فَاِلَيْنَا مَرْجِعُهُمْ ثُمَّ اللّٰهُ شَهِيْدٌ عَلٰى مَا يَفْعَلُوْنَ ﴿٤٧﴾

48. තවද සෑම ජන සමූහයක් සඳහාම දූතයෙක් වේ. එහෙයින් ඔවුන්ගේ දූතයා පැමිණෙනවිට ඔවුන් අතර සාධාරණ ලෙස විනිශ්චය කරනු ලැබේ. ඔවුන් අසාධාරණ නොකරනු ලබන්නෝය.

وَلِكُلِّ اُمَّةٍ رَّسُوْلٌ ۚ فَاِذَا جَآءَ رَسُوْلُهُمْ قُضِىَ بَيْنَهُمْ بِالْقِسْطِ وَهُمْ لَا يُظْلَمُوْنَ ﴿٤٨﴾

49. 'නුඹලා සත්‍යවාදීන් නම් මෙම පොරොන්දුව (ඉටුකරනු ලබන්නේ) කවදාදැ?'යි ඔවුහු කියති.

وَيَقُوْلُوْنَ مَتٰى هٰذَا الْوَعْدُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٤٩﴾

50. පවසන්න 'අල්ලාහ් අභිමත දේ හැර මා වෙනුවෙන් යහපතක් හෝ අයහපතක් කර ගැනීමට මට

قُلْ لَّاۤ اَمْلِكُ لِنَفْسِىْ ضَرًّا وَّلَا نَفْعًا اِلَّا

مَا شَآءَ اللّٰهُ ؕ لِكُلِّ اُمَّةٍ اَجَلٌ ؕ اِذَا جَآءَ اَجَلُهُمْ فَلَا يَسْتَاْخِرُوْنَ سَاعَةً وَّلَا يَسْتَقْدِمُوْنَ ﴿۵۰﴾

ශක්තියක් නැත. සෑම (අවිශ්වාසිත) ජන සමූහයක් සඳහාම නියමිත කාලයක් ඇත. ඔවුන්ගේ කාලය පැමිණෙන විට එක් මොහොතක්වත් නැවතී සිටීමට ඔවුනට නොහැක. (එයින්) ඉදිරියට යාමටද ඔවුනට නොහැක'.

قُلْ اَرَءَيْتُمْ اِنْ اَتٰىكُمْ عَذَابُهٗ بَيَاتًا اَوْ نَهَارًا مَّاذَا يَسْتَعْجِلُ مِنْهُ الْمُجْرِمُوْنَ ﴿۵۱﴾

51. පවසන්න, 'රාත්‍රියේ හෝ දවාලයේ ඔහුගේ දඬුවම නුඹලා වෙත පැමිණියහොත්, වරදකරුවන් කෙතරම් කඩිනම් වුවත් එයින් පලායන්නේ කෙසේදැයි මා හට කියනු'.

اَثُمَّ اِذَا مَا وَقَعَ اٰمَنْتُمْ بِهٖ ؕ آٰلْـٰٔنَ وَقَدْ كُنْتُمْ بِهٖ تَسْتَعْجِلُوْنَ ﴿۵۲﴾

52. 'එසේනම් නුඹලාට එය අත්වූවායින් පසුවද නුඹලා එය කෙරෙහි විශ්වාස කරන්නේ? කිමද, දැන්! එය ඉක්මණින් පැමිණීම (මීට කලින්) නුඹලා ඉල්ලා සිටියානේද?'

ثُمَّ قِيْلَ لِلَّذِيْنَ ظَلَمُوْا ذُوْقُوْا عَذَابَ الْخُلْدِ ۚ هَلْ تُجْزَوْنَ اِلَّا بِمَا كُنْتُمْ تَكْسِبُوْنَ ﴿۵۳﴾

53. පසුව 'නිරන්තර දඬුවම නුඹලා විඳිනු. නුඹලා උපයමින් සිටි දෙය වෙනුවෙන් විනා (අන්දෙයකට) නුඹලාට ප්‍රතිවිපාක දෙනු ලබන්නේදැ'යි වැරදි කළවුන්ට පවසනු ලබන්නේය.

وَيَسْتَنْۢبِـُٔوْنَكَ اَحَقٌّ هُوَ ؕ قُلْ اِىْ وَرَبِّىْٓ اِنَّهٗ لَحَقٌّ ۚ وَمَآ اَنْتُمْ بِمُعْجِزِيْنَ ﴿۵۴﴾

54. තවද 'එය සත්‍යයදැ'යි ඔවුහු ඔබගෙන් විමසති. පවසන්න, 'එසේය, මාගේ අධිපතියාණන්ගේ නාමයෙන්! එය අතිශයින්ම සත්‍යය වේ. තවද නුඹලාට එය නිෂ්ඵල කළ නොහැක.'

وَلَوْ اَنَّ لِكُلِّ نَفْسٍ ظَلَمَتْ مَا فِى الْاَرْضِ لَافْتَدَتْ بِهٖ ؕ وَاَسَرُّوا النَّدَامَةَ لَمَّا رَاَوُا الْعَذَابَ ۚ وَقُضِىَ بَيْنَهُمْ بِالْقِسْطِ وَهُمْ لَا يُظْلَمُوْنَ ﴿۵۵﴾

55. තවද වරද කරන හැම ආත්මයක්ම පොළොවෙහි ඇති සියළු දේ ලබාගතහොත් නියතවශයෙන්ම (තමන්ට) වන්දි වශයෙන් එය දෙනු ඇත. තවද ඔවුන් දඬුවම දකින විට ඔවුහු (තමන්ගේ) කණගාටුව සඟවා ගන්නෝය. තවද ඔවුන් අතර සාධාරණයෙන් විනිශ්චය කරනු ලබන්නේය. තවද ඔවුනට අසාධාරණයක් නොකරනු ලබන්නේය.

اَلَآ اِنَّ لِلّٰهِ مَا فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ

56. අවධාරණයයි! අහස්හිද පොළොවෙහිද ඇති සියල්ල

أَلَآ إِنَّ وَعْدَ ٱللَّهِ حَقٌّ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ٥٦

නියතවශයෙන්ම අල්ලාහ්ට අයත්ය. අවධාරණයයි! සත්තකින්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය වේ. එහෙත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

هُوَ يُحْيِۦ وَيُمِيتُ وَإِلَيْهِ تُرْجَعُونَ ٥٧

57. ජීවය දෙන්නේද, මරණය පමුණුවන්නේද ඔහුමය. තවද ඔහු වෙත නුඹලා ආපසු ගෙනයනු ලබන්නෝය .

يَٰٓأَيُّهَا ٱلنَّاسُ قَدْ جَآءَتْكُم مَّوْعِظَةٌ مِّن رَّبِّكُمْ وَشِفَآءٌ لِّمَا فِى ٱلصُّدُورِ وَهُدًى وَرَحْمَةٌ لِّلْمُؤْمِنِينَ ٥٨

58. එම්බල මිනිසුනි! නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලා වෙත අනුශාසනාවක් ඇත්තෙන්ම පැමිණ ඇත. තවද (එය) හදවත් තුළ ඇති ඕනෑම (රෝගී) දෙයට නිවාරණයක්ද එමෙන්ම විශ්වාසිතයින්ට මග පෙන්වීමක්ද, දයාවක්ද වේ.

قُلْ بِفَضْلِ ٱللَّهِ وَبِرَحْمَتِهِۦ فَبِذَٰلِكَ فَلْيَفْرَحُوا۟ هُوَ خَيْرٌ مِّمَّا يَجْمَعُونَ ٥٩

59. පවසන්න, '(මේ සියල්ල) අල්ලාහ්ගේ කරුණාව මගින් මෙන්ම ඔහුගේ දයාව මගින්ය. එබැවින්, ඔවුහු එයින් ප්‍රමෝදමත් වෙත්වා. ඔවුන් රැස්කරන දෙයට වඩා එය යහපත් වේ.'

قُلْ أَرَءَيْتُم مَّآ أَنزَلَ ٱللَّهُ لَكُم مِّن رِّزْقٍ فَجَعَلْتُم مِّنْهُ حَرَامًا وَحَلَٰلًا قُلْ ءَآللَّهُ أَذِنَ لَكُمْ أَمْ عَلَى ٱللَّهِ تَفْتَرُونَ ٦٠

60. 'අල්ලාහ් නුඹලාට ජීවනෝපාය පහළ කළ බවත් නුඹලා එයින් (සමහරක්) අනිත්‍යානුකූල කළ මෙන්ම (සමහරක්) නිත්‍යානුකූල කළ බවත් නුඹලා මෙනෙහි කළෙහුද,?'යි පවසන්න. '(එයට) අල්ලාහ් නුඹලාට අවසර දී තිබේද? නැතහොත් අල්ලාහ්ට එරෙහිව නුඹලා බොරු ගොතන්නෙහුද,?'යි අසන්න.

وَمَا ظَنُّ ٱلَّذِينَ يَفْتَرُونَ عَلَى ٱللَّهِ ٱلْكَذِبَ يَوْمَ ٱلْقِيَٰمَةِ إِنَّ ٱللَّهَ لَذُو فَضْلٍ عَلَى ٱلنَّاسِ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَشْكُرُونَ ٦١

61. අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නන් පුනරුත්ථාන දිනය පිළිබඳව කුමක් සිතන්නේද? නියතවශයෙන්ම අල්ලාහ් මනුෂ්‍යයින් කෙරෙහි කරුණාවන්තය. එහෙත් ඔවුන්ගෙන් බොහෝ අය කෘතඥ නොවෙති.

وَمَا تَكُوْنُ فِيْ شَاْنٍ وَّمَا تَتْلُوْا مِنْهُ مِنْ
قُرْاٰنٍ وَّلَا تَعْمَلُوْنَ مِنْ عَمَلٍ اِلَّا كُنَّا
عَلَيْكُمْ شُهُوْدًا اِذْ تُفِيْضُوْنَ فِيْهِ ؕ وَمَا
يَعْزُبُ عَنْ رَّبِّكَ مِنْ مِّثْقَالِ ذَرَّةٍ فِي
الْاَرْضِ وَلَا فِي السَّمَآءِ وَلَاۤ اَصْغَرَ مِنْ
ذٰلِكَ وَلَاۤ اَكْبَرَ اِلَّا فِيْ كِتٰبٍ مُّبِيْنٍ ﴿٦٢﴾

62. තවද නුඹලා එහි මුළුමනින්ම යෙදෙන කල්හි අප නුඹලාව බලනවා මිස ඔබ යෙදී සිටින කිසිවක් හෝ තවද ඔබ ඔහුගෙන් පාරායණය කරන කුර්ආනයේ කිසිඳු කොටසක් හෝ තවද නුඹලා කරන කිසිවක් හෝ නැත. පොළොවෙහි හා අහස්හි වන අංශුවක තරම් හෝ ඊටත් වඩා අඩු දෙයක් වුවද එය පැහැදිලි පුස්තකයක (සටහන්වී ඇති) මිස කිසිඳු දෙයක් නුඹලාගේ අධිපතියාණන්ගෙන් සැඟවී නැත.

اَلَاۤ اِنَّ اَوْلِيَآءَ اللّٰهِ لَا خَوْفٌ عَلَيْهِمْ وَلَا
هُمْ يَحْزَنُوْنَ ﴿٦٣﴾ ۚ

63. අසනු! නියතවශයෙන්ම අල්ලාහ්ගේ මිතුරන් වන ඔවුනට කිසිඳු බියක්ද නැත. ඔවුන් ශෝකයට පත්වන්නේද නැත.

اَلَّذِيْنَ اٰمَنُوْا وَكَانُوْا يَتَّقُوْنَ ﴿٦٤﴾ ؕ

64. ඔවුහු විශ්වාස කොට සඳා බියබැතිමත් වූ අය වෙති.

لَهُمُ الْبُشْرٰى فِي الْحَيٰوةِ الدُّنْيَا وَفِي
الْاٰخِرَةِ ؕ لَا تَبْدِيْلَ لِكَلِمٰتِ اللّٰهِ ؕ ذٰلِكَ
هُوَ الْفَوْزُ الْعَظِيْمُ ﴿٦٥﴾ ؕ

65. ඔවුනට මෙලොව ජිවිතයේදී මෙන්ම පරලොවදී ද සුභාරංචි ඇත. අල්ලාහ්ගේ වදන්වල වෙනස්වීමක් නැත. එය ඇත්තෙන්ම අති මහත් ජයග්‍රහණයයි.

وَلَا يَحْزُنْكَ قَوْلُهُمْ ۘ اِنَّ الْعِزَّةَ لِلّٰهِ
جَمِيْعًا ؕ هُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿٦٦﴾

66. තවද ඔවුන්ගේ වදන් ඔබව ශෝකයට පත් නොකරත්වා. ඇත්තෙන්ම සියළු ගෞරවය අල්ලාහ් සතුය. ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

اَلَاۤ اِنَّ لِلّٰهِ مَنْ فِي السَّمٰوٰتِ وَمَنْ فِي
الْاَرْضِ ؕ وَمَا يَتَّبِعُ الَّذِيْنَ يَدْعُوْنَ مِنْ
دُوْنِ اللّٰهِ شُرَكَآءَ ؕ اِنْ يَّتَّبِعُوْنَ اِلَّا
الظَّنَّ وَاِنْ هُمْ اِلَّا يَخْرُصُوْنَ ﴿٦٧﴾

67. අවධාරණයයි! අහස්හි ඇති සියලු දෑද පොළොවෙහි ඇති සියලු දෑද අල්ලාහ්ට අයත්ය. අල්ලාහ්ට හැර සමානයන්ට යදින්නන් (ඇත්තෙන්ම) ඔවුන්ව අනුගමනය නොකරති. ඔවුන් අනුමානය මිස අන් දෙයක් අනුගමනය නොකරන අතර නියැලී සිටින්නේ ශෝභනය මිස නැත.

هُوَ الَّذِي جَعَلَ لَكُمُ اللَّيْلَ لِتَسْكُنُوا فِيهِ وَالنَّهَارَ مُبْصِرًا ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِقَوْمٍ يَسْمَعُونَ ﴿٦٨﴾

68. නුඹලා එහි විවේක ගනු පිණිස රාත්‍රියද, දවාල දිප්තිමත් ලෙසද මවා ඇත්තේ ඔහුමය. ඇත්තෙන්ම සවන් දෙන ජනතාවට එහි සළකුණු ඇත.

قَالُوا اتَّخَذَ اللَّهُ وَلَدًا ۗ سُبْحَانَهُ ۖ هُوَ الْغَنِيُّ ۖ لَهُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۚ إِنْ عِنْدَكُمْ مِنْ سُلْطَانٍ بِهَٰذَا ۚ أَتَقُولُونَ عَلَى اللَّهِ مَا لَا تَعْلَمُونَ ﴿٦٩﴾

69. ඔවුන් 'අල්ලාහ් (ඔහුට) පුතෙකු ඇතිකර ගත්තේයැ'යි කියති. ඔහු සුවිශුද්ධය! ඔහු ස්වයංපෝෂිතය. අහස්හි සහ පොළොවෙහි ඇති සියලු දේවල් ඔහුටම අයත් වේ. මේ සඳහා නුඹලාට අවසරයක් නැත. නුඹලා නොදන්නා දෙයක් අල්ලාහ්ට එරෙහිව නුඹලා කියන්නෙහුද?

قُلْ إِنَّ الَّذِينَ يَفْتَرُونَ عَلَى اللَّهِ الْكَذِبَ لَا يُفْلِحُونَ ﴿٧٠﴾

70. 'අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නන් ජය නොලබන්නේයැ'යි පවසන්න.

مَتَاعٌ فِي الدُّنْيَا ثُمَّ إِلَيْنَا مَرْجِعُهُمْ ثُمَّ نُذِيقُهُمُ الْعَذَابَ الشَّدِيدَ بِمَا كَانُوا يَكْفُرُونَ ﴿٧١﴾

71. මෙලොවෙහි අනිත්‍ය සුළු ලාභයක් (ඔවුන් ලබන්නෝ)ය. පසුව ඔවුන්ගේ ආපසු පැමිණීම අප වෙත වේ. පසුව ඔවුන් විශ්වාස නොකළ බැවින් අපි ඔවුනට බරපතල දඬුවමක් විඳින්නට සලස්වන්නෙමු.

وَاتْلُ عَلَيْهِمْ نَبَأَ نُوحٍ إِذْ قَالَ لِقَوْمِهِ يَا قَوْمِ إِنْ كَانَ كَبُرَ عَلَيْكُمْ مَقَامِي وَتَذْكِيرِي بِآيَاتِ اللَّهِ فَعَلَى اللَّهِ تَوَكَّلْتُ فَأَجْمِعُوا أَمْرَكُمْ وَشُرَكَاءَكُمْ ثُمَّ لَا يَكُنْ أَمْرُكُمْ عَلَيْكُمْ غُمَّةً ثُمَّ اقْضُوا إِلَيَّ وَلَا تُنْظِرُونِ ﴿٧٢﴾

72. නුහ්ගේ කථාව ඔවුනට කියා දෙන්න. ඔහු සිය ජනතාවට (මෙසේ) පැවසූ විට 'එම්බල මාගේ ජනතාවනි, මාගේ ස්ථානය ද (නුඹලාගේ යුතුකම් පිළිබඳව) අල්ලාහ්ගේ සළකුණු මගින් මාගේ මතක් කිරීම ද නුඹලාට පිළිකුල් වේ නම්, මම අල්ලාහ් කෙරෙහි මාගේ විශ්වාසය තබන්නෙමි. එහෙයින් නුඹලාගේ (සියළු) උපක්‍රම සහ (අල්ලාහ්ට තබන) නුඹලාගේ සමානයන් එක්රැස් කරගනු. නුඹලාගේ ක්‍රියාමාර්ගය නුඹලාට සැක නොවිය යුතුය. පසුව මට එරෙහිව (නුඹලාගේ උපක්‍රම) ක්‍රියාත්මක කරනු. තවද මා හට කාල අවකාශයක් නොදෙනු'.

73. 'එහෙත් නුඹලා පිටුපාන්නේ නම් (සිහි තබාගනු) මා නුඹලාගෙන් කිසිදු ප්‍රතිලාභයක් ඉල්ලා නොමැත. මාගේ තිළිණය අල්ලාහ් වෙතින් පමණි. තවද අවනතවන්නන් අතර වීමට මා අණකරන ලද්දෙමි'.

فَاِنۡ تَوَلَّيۡتُمۡ فَمَا سَاَلۡتُكُمۡ مِّنۡ اَجۡرٍ ؕ اِنۡ اَجۡرِىَ اِلَّا عَلَى اللّٰهِ ۙ وَاُمِرۡتُ اَنۡ اَكُوۡنَ مِنَ الۡمُسۡلِمِيۡنَ ۝٧٣

74. නමුත් ඔවුන් ඔහුව ප්‍රතික්ෂේප කළෝය. එබැවින් ඔහු ද ඔහු සමඟ නැවෙහි සිටියවුන්ව ද අපි බේරා ගත්තෙමු. තවද අපි ඔවුන්ව නියෝජිතයන් කළෙමු. තවද අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළවුන්ව ගිල්වුවෙමු. එහෙයින්, අනතුරු අඟවනු ලැබුවන්ගේ අවසානය කෙසේවූයේදැයි බලන්න.

فَكَذَّبُوۡهُ فَنَجَّيۡنٰهُ وَمَنۡ مَّعَهٗ فِى الۡفُلۡكِ وَجَعَلۡنٰهُمۡ خَلٰۤـئِفَ وَاَغۡرَقۡنَا الَّذِيۡنَ كَذَّبُوۡا بِاٰيٰتِنَا ۚ فَانۡظُرۡ كَيۡفَ كَانَ عَاقِبَةُ الۡمُنۡذَرِيۡنَ ۝٧٤

75. අනතුරුව, ඔහුගෙන් පසු අපි (වෙනත්) දූතයින්ව ඔවුන්ගේ ජනතාව වෙත යැව්වෙමු. තවද ඔවුහු ඔවුන්වෙත පැහැදිලි සාධක ගෙන ආහ. නමුත් ඔවුන් ඒවා කලින් ප්‍රතික්ෂේප කර තිබූ බැවින් ඔවුහු ඒවා කෙරෙහි විශ්වාස නොකළහ. සීමාව ඉක්මවන්නන්ගේ හදවත්වලට අපි මෙසේ මුද්‍රා තැබුවෙමු.

ثُمَّ بَعَثۡنَا مِنۡۢ بَعۡدِهٖ رُسُلًا اِلٰى قَوۡمِهِمۡ فَجَآءُوۡهُمۡ بِالۡبَيِّنٰتِ فَمَا كَانُوۡا لِيُؤۡمِنُوۡا بِمَا كَذَّبُوۡا بِهٖ مِنۡ قَبۡلُ ؕ كَذٰلِكَ نَطۡبَعُ عَلٰى قُلُوۡبِ الۡمُعۡتَدِيۡنَ ۝٧٥

76. ඔවුන්ගෙන් පසු අපගේ සළකුණු සමඟින් මූසා සහ හාරූන්ව අපි ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් වෙත යැව්වෙමු. එහෙත් ඔවුහු අහංකාරව ක්‍රියා කළහ. තවද ඔවුහු පාපකාරී සමූහයක් වූහ.

ثُمَّ بَعَثۡنَا مِنۡۢ بَعۡدِهِمۡ مُّوۡسٰى وَهٰرُوۡنَ اِلٰى فِرۡعَوۡنَ وَمَلَا۟ئِهٖ بِاٰيٰتِنَا فَاسۡتَكۡبَرُوۡا وَكَانُوۡا قَوۡمًا مُّجۡرِمِيۡنَ ۝٧٦

77. තවද අප වෙතින් සත්‍යය ඔවුන් වෙත පැමිණෙන විට 'මෙය නියතවශයෙන්ම පැහැදිලි ඉන්ද්‍රජාලයක් වේ.' යැයි ඔවුහු කීහ.

فَلَمَّا جَآءَهُمُ الۡحَـقُّ مِنۡ عِنۡدِنَا قَالُوۡۤا اِنَّ هٰذَا لَسِحۡرٌ مُّبِيۡنٌ ۝٧٧

78. 'නුඹලා සත්‍යය ගැන එය නුඹලා වෙත පැමිණෙන විට (මෙසේ) පවසන්නෙහු ද? මෙය ඉන්ද්‍රජාලයක්ද? ඉන්ද්‍රජාලිකයෝ

قَالَ مُوۡسٰۤى اَتَقُوۡلُوۡنَ لِلۡحَـقِّ لَمَّا جَآءَكُمۡ ؕ اَسِحۡرٌ هٰذَا ؕ وَلَا يُفۡلِحُ

السّٰحِرُوْنَ ۝٧٨

කිසිවිටෙකත් ජය නොලබන්නෝයැ'යි මූසා කීවේය.

قَالُوْٓا اَجِئْتَنَا لِتَلْفِتَنَا عَمَّا وَجَدْنَا عَلَيْهِ اٰبَآءَنَا وَتَكُوْنَ لَكُمَا الْكِبْرِيَآءُ فِى الْاَرْضِ ؕ وَمَا نَحْنُ لَكُمَا بِمُؤْمِنِيْنَ ۝٧٩

79. 'අපගේ පියවරුන් අනුගමනය කළ අප දුටු දැයින් අපව හරවන්නටත් භූමියෙහි නුඹලා දෙදෙනාට ශ්‍රේෂ්ඨත්වයක් ලැබීම පිණිසත් නුඹලා අප වෙත පැමිණ සිටිත්ද? නමුත් නුඹලාගෙන් එකෙකුවත් අපි විශ්වාස නොකරමු' යි ඔවුහු කීහ.

وَقَالَ فِرْعَوْنُ ائْتُوْنِىْ بِكُلِّ سٰحِرٍ عَلِيْمٍ ۝٨٠

80. තවද 'සෑම දක්ෂ විජ්ජාකාරයෙකුවම මා වෙත ගෙන එනු' යි ෆිර්අවුන් කීවේය.

فَلَمَّا جَآءَ السَّحَرَةُ قَالَ لَهُمْ مُّوْسٰٓى اَلْقُوْا مَآ اَنْتُمْ مُّلْقُوْنَ ۝٨١

81. තවද විජ්ජාකරුවන් පැමිණි කල්හි 'නුඹලා විසිකරන්නට යන දේ විසිකරනු' යි මූසා ඔවුනට කීවේය.

فَلَمَّآ اَلْقَوْا قَالَ مُوْسٰى مَا جِئْتُمْ بِهِ ۙ السِّحْرُ ؕ اِنَّ اللّٰهَ سَيُبْطِلُهٗ ؕ اِنَّ اللّٰهَ لَا يُصْلِحُ عَمَلَ الْمُفْسِدِيْنَ ۝٨٢

82. ඔවුන් විසිකළ විට 'නුඹලා ගෙන ආ දේ (හුදෙක්) මායාවක්ය. නියතවශයෙන්ම අල්ලාහ් මෙය නිෂ්ඵල කරන්නේය. සැබැවින්ම, කලහකරුවන්ගේ ක්‍රියා ජය ගැනීමට අල්ලාහ් ඉඩ නොතබන්නේයැ.'යි මූසා කීවේය.

وَيُحِقُّ اللّٰهُ الْحَقَّ بِكَلِمٰتِهٖ وَلَوْ كَرِهَ الْمُجْرِمُوْنَ ۝٨٣ ع

83. තවද 'පාපකාරීන් එයට කෙතරම් අකමැතිවුවද අල්ලාහ්, ඔහුගේ වචනයන් ගෙන් සත්‍යය සනාථ කරයි.'

فَمَآ اٰمَنَ لِمُوْسٰٓى اِلَّا ذُرِّيَّةٌ مِّنْ قَوْمِهٖ عَلٰى خَوْفٍ مِّنْ فِرْعَوْنَ وَمَلَا۟ئِهِمْ اَنْ يَّفْتِنَهُمْ ؕ وَاِنَّ فِرْعَوْنَ لَعَالٍ فِى الْاَرْضِ ۚ وَاِنَّهٗ لَمِنَ الْمُسْرِفِيْنَ ۝٨٤

84. තවද ඔවුන්ට වධ හිංසා කරනු ඇතැයි ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් කෙරෙහි බිය නිසා ඔහුගේ ජනතාව අතරින් (තරුණ) සන්තතියක් හැරෙන්නට අන් කිසිවෙක් මූසාව විශ්වාස නොකළහ. තවද ඇත්තෙන්ම ෆිර්අවුන් භූමියෙහි කෘෘර පාලකයා වූ අතර නියතවශයෙන්ම ඔහු සීමාව ඉක්මවන්නන්ගෙන් විය.

وَقَالَ مُوْسٰى يٰقَوْمِ اِنْ كُنْتُمْ اٰمَنْتُمْ بِاللّٰهِ فَعَلَيْهِ تَوَكَّلُوْٓا اِنْ كُنْتُمْ مُّسْلِمِيْنَ ﴿٨٥﴾

85. තවද 'මාගේ ජනතාවනි! නුඹලා අල්ලාහ් කෙරෙහි විශ්වාස කර ඇත්නම්, එවිට ඔහු කෙරෙහිම නුඹලාගේ විශ්වාසය තබනු. (ඔහුගේ කැමැත්තට) සත්තකින්ම නුඹලා අවනත වන්නේ නම්' යැයි මූසා කීවේය.

فَقَالُوْا عَلَى اللّٰهِ تَوَكَّلْنَا ۚ رَبَّنَا لَا تَجْعَلْنَا فِتْنَةً لِّلْقَوْمِ الظّٰلِمِيْنَ ﴿٨٦﴾

86. තවද 'අල්ලාහ් කෙරෙහි අපි අපගේ විශ්වාසය තබමු. අපගේ අධිපතියාණෙනි, වැරදි කරන ජනතාවට අපව පිරික්සුමක් නොකරනු මැනවැ'යි ඔවුහු කීහ.

وَنَجِّنَا بِرَحْمَتِكَ مِنَ الْقَوْمِ الْكٰفِرِيْنَ ﴿٨٧﴾

87. 'තවද ඔබගේ දයාව මගින් අවිශ්වාසිත ජනයාගෙන් අපව මුදවා ගනු මැනව.'

وَاَوْحَيْنَآ اِلٰى مُوْسٰى وَاَخِيْهِ اَنْ تَبَوَّاٰ لِقَوْمِكُمَا بِمِصْرَ بُيُوْتًا وَّاجْعَلُوْا بُيُوْتَكُمْ قِبْلَةً وَّاَقِيْمُوا الصَّلٰوةَ ۗ وَبَشِّرِ الْمُؤْمِنِيْنَ ﴿٨٨﴾

*88. තවද අපි මූසා සහ ඔහුගේ සොහොයුරා වෙත 'නුඹලාගේ ජනතාව සඳහා නගරයෙහි ගෙවල් තනනු. තවද නුඹලාගේ ගෙවල්ද එකම දිශාවටම මුහුණලා සාදා ගනු. තවද නැමදුමෙහි නිරතවෙනු. තවද විශ්වාසිතයින්ට ශුභාරංචි දෙන්නැ.'යි (පවසමින්) අනාවරණය කළෙමු.

وَقَالَ مُوْسٰى رَبَّنَآ اِنَّكَ اٰتَيْتَ فِرْعَوْنَ وَمَلَاَهٗ زِيْنَةً وَّاَمْوَالًا فِى الْحَيٰوةِ الدُّنْيَا ۙ رَبَّنَا لِيُضِلُّوْا عَنْ سَبِيْلِكَ ۚ رَبَّنَا اطْمِسْ عَلٰٓى اَمْوَالِهِمْ وَاشْدُدْ عَلٰى قُلُوْبِهِمْ فَلَا

89. තවද 'අපගේ අධිපතියාණෙනි! ඔබ ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන්ට මෙලොව ජීවිතයෙහි ආභරණයන් සහ වස්තූන් පිරිනමා ඇත. අපගේ අධිපතියාණෙනි! එහි ප්‍රතිඵලය වනුයේ ඔවුන් ඔබගේ මාර්ගයෙන් (ජනතාව) නොමගට හැරවීම පමණි. අපගේ අධිපතියාණෙනි! ඔවුන්ගේ

---

* සටහන. 88: මෙම වාක්‍යයෙහි යෙදෙන 'වජ්අලූ බුයූතකුම් කිබ්ලතන්' ( وَّاجْعَلُوْا بُيُوْتَكُمْ قِبْلَةً ) යන අරාබි වදන්වල අරුත වියහැක්කේ, කිබ්ලාවට මුහුණලා එනම් නමස්කාරයෙහි දිශාව ගෙන දෙන්නාවූ ස්ථානය හෝ තැන නැත්නම් එකිනෙකට මුහුණලා නැත්නම් එකම දිශාවට මුහුණලා යන්නයි.

මෙහි යෙදෙන පළමු අරුත ගැනීමට නොහැකි වන්නේ සුලෙයිමාන්ගේ නැමදුම් ස්ථානය ගොඩනැගීමට පෙර ඉස්රාඊලයේ දරුවන්ට ස්ථිරවූ කිබ්ලාවක් අනුමත කර නොතිබූ නිසාය. දෙවන අර්ථයට ප්‍රමුඛත්වය දෙනු ලබන්නේ නම්, එවිට සිද්ධිය වනුයේ ආරක්‍ෂාව පතා නිවෙස් එකිනෙකට මුහුණලා සැදූ වගයි.

අපි මෙහි තුන්වන අරුතට කැමති වන්නෙමු. 'නුඹලාගේ නිවෙස් එකම දිශාවට මුහුණලා තනනු'. මෙමගින් නිවෙස්වල සියළු වැසියන් එකම දිශාවට නැමදුමෙහි යෙදෙන වාසිය ලැබේ. මෙය ඔවුනතර සමගිය සහ යහපත් චර්යාවක් ඇති කරයි. මෙම උපදෙස්වලට පසුව නමස්කාරයෙහි නිරතවීමට විශ්වාසිතයින්ට අණකිරීම, අපගේ මෙම අදහස් තවත් ශක්තිමත් කරයි. මක්නිසාද යත් 'අකීමුස් සලාත' ( اَقِيْمُوا الصَّلٰوةَ ) යන අරාබි වදන හුදෙක් තනිව නමස්කාර කිරීමට අණ කිරීමක් නොවන අතර එය සාමූහික නමස්කාරයට මුල්තැන දෙයි.

සම්පත් වනසා දමනු මැනව. තවද ඔවුන්ගේ හදවත් කෙරෙහි දැඩිවනු මැනව. මක්නිසාද යත් ඔවුන් වේදනීය දඬුවමක් දකිනා තුරු ඔවුන් විශ්වාස නොකරන්නේයැ.' යි මූසා කීවේය.

يُؤْمِنُوا حَتَّىٰ يَرَوُا الْعَذَابَ الْأَلِيمَ ﴿٨٩﴾

90. 'නුඹලාගේ යාච්ඤාව පිළිගන්නා ලදී. එබැවින් නුඹලා දෙදෙනා ස්ථිරසාර වෙනු. තවද නොදන්නා අයගේ මාර්ගය අනුගමනය නොකරනු.' යි ඔහු කීවේය.

قَالَ قَدْ أُجِيبَت دَّعْوَتُكُمَا فَاسْتَقِيمَا وَلَا تَتَّبِعَانِّ سَبِيلَ الَّذِينَ لَا يَعْلَمُونَ ﴿٩٠﴾

91. තවද අපි ඉස්රාඊලයේ දරුවන්ව මුහුදින් එතෙර කළෙමු. තවද ෆිර්අවුන් සහ ඔහුගේ සේනාවන් දුෂ්ඨ සිතින් සහ වෛරයෙන් ඔවුන්ව ලුහු බැඳ ගියෝය. එවිට, ගිල්වීම (විපත) ඔහුව හසුකරන තෙක්, 'ඉස්රාඊලයේ දරුවන් යමෙකු කෙරෙහි විශ්වාස කරන්නේද නැමදීමට සුදුස්සා ඔහු හැර අන්කිසිවෙකු නොමැති බව මම විශ්වාස කරමි. තවද මම (ඔහුට) අවනත වන්නන්ගෙන් වෙමි.'යි ඔහු කීවේය.

وَجَاوَزْنَا بِبَنِي إِسْرَائِيلَ الْبَحْرَ فَأَتْبَعَهُمْ فِرْعَوْنُ وَجُنُودُهُ بَغْيًا وَعَدْوًا ۖ حَتَّىٰ إِذَا أَدْرَكَهُ الْغَرَقُ قَالَ آمَنتُ أَنَّهُ لَا إِلَٰهَ إِلَّا الَّذِي آمَنَتْ بِهِ بَنُو إِسْرَائِيلَ وَأَنَا مِنَ الْمُسْلِمِينَ ﴿٩١﴾

92. කිමද! දැන්! මීට පෙරද නුඹ අකීකරු වී ඇති අතර නුඹ කෝලාහල කරන්නන්ගෙන් වූවෙහිය.

آلْآنَ وَقَدْ عَصَيْتَ قَبْلُ وَكُنتَ مِنَ الْمُفْسِدِينَ ﴿٩٢﴾

93. එබැවින් නුඹට පසුව (පැමිණෙන) අයට සළකුණක් වනු පිණිස මෙදින අපි නුඹව නුඹගේ ශරීරයෙන් (පමණක්) මුදාගන්නෙමු. තවද නියතවශයෙන්ම මනුෂ්‍යයන්ගෙන් බොහෝ අය අපගේ සලකුණු නොතකන්නෝය.

فَالْيَوْمَ نُنَجِّيكَ بِبَدَنِكَ لِتَكُونَ لِمَنْ خَلْفَكَ آيَةً ۚ وَإِنَّ كَثِيرًا مِّنَ النَّاسِ عَنْ آيَاتِنَا لَغَافِلُونَ ﴿٩٣﴾ ع

94. තවද අපි ඉස්රාඊලයේ දරුවන්ට විශිෂ්ටවූ වාසස්ථානයක් නියම කළෙමු. තවද අපි ඔවුනට යහපත් දේවල් ලබාදුනිමු. තවද ඔවුනට දැනුම පැමිණි අවස්ථාව තෙක් ඔවුහු භේද නොවූහ. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් ඔවුන් භේදවූ

وَلَقَدْ بَوَّأْنَا بَنِي إِسْرَائِيلَ مُبَوَّأَ صِدْقٍ وَرَزَقْنَاهُم مِّنَ الطَّيِّبَاتِ فَمَا اخْتَلَفُوا حَتَّىٰ جَاءَهُمُ الْعِلْمُ ۚ إِنَّ رَبَّكَ يَقْضِي

بَيْنَهُمْ يَوْمَ الْقِيٰمَةِ فِيْمَا كَانُوْا فِيْهِ يَخْتَلِفُوْنَ ﴿٩٤﴾

දේ පිළිබඳව පුනරුත්ථාන දිනයේදී ඔවුන් අතර විනිශ්චය කරන්නේය.

فَاِنْ كُنْتَ فِيْ شَكٍّ مِّمَّاۤ اَنْزَلْنَاۤ اِلَيْكَ فَسْـَٔلِ الَّذِيْنَ يَقْرَءُوْنَ الْكِتٰبَ مِنْ قَبْلِكَ ۚ لَقَدْ جَآءَكَ الْحَقُّ مِنْ رَّبِّكَ فَلَا تَكُوْنَنَّ مِنَ الْمُمْتَرِيْنَ ﴿٩٥﴾

95. තවද අප ඔබ වෙත එවා ඇති දේ පිළිබඳව ඔබ සැකයෙහි නම්, ඔබට පෙර පුස්තකය කියවමින් සිටි අයගෙන් විමසන්න. ඇත්තවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ගෙන් ඔබ වෙත සත්‍යය පැමිණ ඇත. එනිසා සැක කරන්නන්ගෙන් නොවන්න.

وَلَا تَكُوْنَنَّ مِنَ الَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِ اللّٰهِ فَتَكُوْنَ مِنَ الْخٰسِرِيْنَ ﴿٩٦﴾

96. තවද ඔබ අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන අයගෙන් නොවන්න. නැතහොත් ඔබ පාඩු විඳින්නන්ගෙන් වන්නෙහිය.

اِنَّ الَّذِيْنَ حَقَّتْ عَلَيْهِمْ كَلِمَتُ رَبِّكَ لَا يُؤْمِنُوْنَ ﴿٩٧﴾

97. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ගේ වදන කවර අයට එරෙහිව බලපා ඇත්තේද ඔවුන් විශ්වාස නොකරන්නෝමය.

وَلَوْ جَآءَتْهُمْ كُلُّ اٰيَةٍ حَتّٰى يَرَوُا الْعَذَابَ الْاَلِيْمَ ﴿٩٨﴾

98. සෑම සලකුණක්ම ඔවුන් වෙත පැමිණියද වේදනීය දඬුවමක් දකිනතුරු (විශ්වාස නොකරන්නෝය).

فَلَوْلَا كَانَتْ قَرْيَةٌ اٰمَنَتْ فَنَفَعَهَاۤ اِيْمَانُهَاۤ اِلَّا قَوْمَ يُوْنُسَ ۗ لَمَّاۤ اٰمَنُوْا كَشَفْنَا عَنْهُمْ عَذَابَ الْخِزْيِ فِى الْحَيٰوةِ الدُّنْيَا وَمَتَّعْنٰهُمْ اِلٰى حِيْنٍ ﴿٩٩﴾

99. යූනුස්ගේ ජනතාව හැරෙන්නට (වෙනත්) ගම් වැසියන් නොසිටියේ මන්ද? ඔවුන් විශ්වාස කර තිබුණි නම් ඔවුන්ගේ විශ්වාසය ඔවුනට ප්‍රයෝජනය ගෙන දෙන්නට තිබුණි. ඔවුන් විශ්වාස කළවිට, අපි ඔවුන්ගෙන් මෙලොව ජිවිතයෙහි නින්දිත දඬුවම ඉවත් කළෙමු. තවද ටික කලකට අපි ඔවුන්ට ජිවනෝපාය සැලැස්වීමු.

وَلَوْ شَآءَ رَبُّكَ لَاٰمَنَ مَنْ فِى الْاَرْضِ كُلُّهُمْ جَمِيْعًا ۗ اَفَاَنْتَ تُكْرِهُ النَّاسَ حَتّٰى

100. තවද ඔබගේ අධිපතියාණන් ඔහුගේ අභිමතය (ක්‍රියාත්මක) කළේ නම් නියතවශයෙන්ම පොළොවෙහි ඇති සියල්ලන්ම එක්ව විශ්වාස කරන්නට තිබුණි. එහෙයින් මිනිසුන්

يَكُونُوا مُؤْمِنِينَ ﴿١٠٠﴾

විශ්වාසිතයින් වන්නට ඔබ බල කරන්නෙහිද?

وَمَا كَانَ لِنَفْسٍ أَنْ تُؤْمِنَ إِلَّا بِإِذْنِ اللَّهِ ۚ وَيَجْعَلُ الرِّجْسَ عَلَى الَّذِينَ لَا يَعْقِلُونَ ﴿١٠١﴾

101. තවද අල්ලාහ්ගේ අවසරයෙන් මිස කිසිඳු ආත්මයකට විශ්වාස කළ නොහැක. තවද සිහිබුද්ධියෙන් ක්‍රියා නොකරන්නන් කෙරෙහි (ඔහුගේ) උදහස ඔහු (පහළ) කරන්නේය.

قُلِ انْظُرُوا مَاذَا فِي السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ وَمَا تُغْنِي الْآيَاتُ وَالنُّذُرُ عَنْ قَوْمٍ لَا يُؤْمِنُونَ ﴿١٠٢﴾

102. 'අහස් සහ පොළොවෙහි (සිදුවන්නාවූ) දේ ගැන සිතා බලනු.'යි පවසන්න. එහෙත් විශ්වාස නොකරන ජනතාවට සලකුණු සහ අවවාද කිරීම් එලක් ගෙන නොදෙයි.

فَهَلْ يَنْتَظِرُونَ إِلَّا مِثْلَ أَيَّامِ الَّذِينَ خَلَوْا مِنْ قَبْلِهِمْ ۚ قُلْ فَانْتَظِرُوا إِنِّي مَعَكُمْ مِنَ الْمُنْتَظِرِينَ ﴿١٠٣﴾

103. එහෙයින් ඔවුන්ට පෙර ඉකුත් වූ අයගේ (දඬුවම් විඳි) කාලය මෙන් මිස අන්දෙයක් ඔවුන් බලාපොරොත්තු වන්නේද? 'එසේනම් බලාපොරොත්තු වනු. (තවද) බලාපොරොත්තු වන්නන් අතර මාද නුඹලා සමග සිටිමි.'යි පවසන්න.

ثُمَّ نُنَجِّي رُسُلَنَا وَالَّذِينَ آمَنُوا ۚ كَذَٰلِكَ حَقًّا عَلَيْنَا نُنْجِ الْمُؤْمِنِينَ ﴿١٠٤﴾

104. පසුව අපි අපගේ දූතයින් සහ විශ්වාස කරන අයව බේරාගන්නෙමු. මේ ආකාරයට (එය නිතරම සිදු) වේ. විශ්වාසිතයින්ව බේරාගැනීම අප කෙරෙහි අනිවාර්යය කරගෙන ඇත්තෙමු.

قُلْ يَا أَيُّهَا النَّاسُ إِنْ كُنْتُمْ فِي شَكٍّ مِنْ دِينِي فَلَا أَعْبُدُ الَّذِينَ تَعْبُدُونَ مِنْ دُونِ اللَّهِ وَلَٰكِنْ أَعْبُدُ اللَّهَ الَّذِي يَتَوَفَّاكُمْ ۖ وَأُمِرْتُ أَنْ أَكُونَ مِنَ الْمُؤْمِنِينَ ﴿١٠٥﴾

105. 'එම්බල මිනිසුනි! මාගේ ධර්මය ගැන නුඹලා සැකයෙන් සිටින්නේ නම්, (දැන ගනු) අල්ලාහ් හැර නුඹලා නමදින අය මම නොනමදින්නෙමි. එහෙත් නුඹලාව මරණයට පත්කරන්නා වූ අල්ලාහ්ට (පමණක්) මම නමදින්නෙමි. තවද විශ්වාසිතයින්ගෙන් වන්නට මා අණ කරන ලද්දෙමි'යි පවසන්න.

وَاَنْ اَقِمْ وَجْهَكَ لِلدِّيْنِ حَنِيْفًا ۚ وَلَا تَكُوْنَنَّ مِنَ الْمُشْرِكِيْنَ ﴿١٠٦﴾

106. තවද '(දෙවියන් වෙත) සදා නැඹුරුවූවෙකු ලෙස ධර්මය දෙසට අවධානය තබාගන්න. තවද ඔබ ඔහුට සමාන තබන්නන්ගෙන් නොවන්න.'(යැයි පවසන ලෙසටත් මා අණ කරන ලද්දෙමි).

وَلَا تَدْعُ مِنْ دُوْنِ اللّٰهِ مَا لَا يَنْفَعُكَ وَلَا يَضُرُّكَ ۚ فَاِنْ فَعَلْتَ فَاِنَّكَ اِذًا مِّنَ الظّٰلِمِيْنَ ﴿١٠٧﴾

107. 'තවද අල්ලාහ් හැර ඔබට ඵලක් දිය නොහැකි හෝ ඔබට හානියක් කළ නොහැකි අන් කිසිවෙකුව නොකැඳවන්න. තවද ඔබ එසේ කළහොත් එවිට නියත වශයෙන්ම ඔබ වැරදි කරන්නන්ගෙන් වන්නෙහිය.'

وَاِنْ يَّمْسَسْكَ اللّٰهُ بِضُرٍّ فَلَا كَاشِفَ لَهٗۤ اِلَّا هُوَ ۚ وَاِنْ يُّرِدْكَ بِخَيْرٍ فَلَا رَآدَّ لِفَضْلِهٖ ؕ يُصِيْبُ بِهٖ مَنْ يَّشَآءُ مِنْ عِبَادِهٖ ؕ وَهُوَ الْغَفُوْرُ الرَّحِيْمُ ﴿١٠٨﴾

108. තවද අල්ලාහ් ඔබට විපතක් ගෙන දෙන්නේ නම් ඔහු හැර අන් කිසිවෙකුට එය ඉවත් කළ නොහැක. එමෙන්ම ඔහු ඔබට යහපතක් පතන්නේ නම් ඔහුගේ ආශිර්වාදය වළක්වාලිය හැකි කිසිවෙක්ද නොවන්නේය. ඔහුගේ දාසයන්ගෙන් ඔහු කැමති අයෙකු වෙත ඔහු එය ලැබීමට සලස්වයි. තවද ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

قُلْ يٰۤاَيُّهَا النَّاسُ قَدْ جَآءَكُمُ الْحَقُّ مِنْ رَّبِّكُمْ ۚ فَمَنِ اهْتَدٰى فَاِنَّمَا يَهْتَدِىْ لِنَفْسِهٖ ۚ وَمَنْ ضَلَّ فَاِنَّمَا يَضِلُّ عَلَيْهَا ۚ وَمَاۤ اَنَا عَلَيْكُمْ بِوَكِيْلٍ ؕ ﴿١٠٩﴾

109. 'එම්බල මිනිසුනි! නුඹලාගේ අධිපතියාණන් වෙතින් නුඹලාට දැන් සත්‍යය පැමිණ ඇත. එබැවින් යහමග අනුගමනය කරන කවරෙකු හෝ වේවා එසේ අනුගමනය කරන්නේ තම ආත්මයේ යහපත සඳහා වේ. තවද කවරෙකු හෝ නොමග යන්නේද නොමග යන්නේ එයට එරෙහිවමය. තවද මම නුඹලාව රකින්නෙකු නොවෙමි.'යි පවසන්න.

وَاتَّبِعْ مَا يُوْحٰۤى اِلَيْكَ وَاصْبِرْ حَتّٰى يَحْكُمَ اللّٰهُ ۖۚ وَهُوَ خَيْرُ الْحٰكِمِيْنَ ﴿١١٠﴾

110. එමෙන්ම, ඔබ වෙත අනාවරණය කරනු ලබන දේ අනුගමනය කරන්න. තවද අල්ලාහ් සිය විනිශ්චය දෙනතෙක් ඉවසිලිවන්තව සිටින්න. තවද ඔහු විනිශ්චයකරුවන්ගෙන් ශ්‍රේෂ්ඨය.



## හූද්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්

الٓرٰ كِتٰبٌ اُحۡكِمَتۡ اٰيٰتُهٗ ثُمَّ فُصِّلَتۡ مِنۡ لَّدُنۡ حَكِيۡمٍ خَبِيۡرٍۙ ②

2. අලිෆ්, ලාම්, රා.◆ මෙය ශක්තිමත් වාක්‍යයන් මෙන්ම නිර්දෝෂ කරන ලද එමෙන්ම ඒවා සවිස්තරාත්මකව විග්‍රහ කරන ලද ග්‍රන්ථයකි. මෙය ප්‍රඥාසම්පන්න (මෙන්ම) සියල්ලෙහි ම විමසිලිමත්වන්නෙකු වෙතින්ය.

اَلَّا تَعۡبُدُوۡۤا اِلَّا اللّٰهَ ؕ اِنَّنِىۡ لَـكُمۡ مِّنۡهُ نَذِيۡرٌ وَّبَشِيۡرٌۙ ③

3. නුඹලා අල්ලාහ් හැර අන් කිසිවෙකු නොනැමදිය යුතු බව (මෙය උගන්වයි.) මම ඔහු වෙතින් නුඹලා වෙත අවවාදකරන්නෙකු මෙන්ම ශුභාරංචි ගෙනෙන්නෙකු වෙමි.

وَّاَنِ اسۡتَغۡفِرُوۡا رَبَّكُمۡ ثُمَّ تُوۡبُوۡۤا اِلَيۡهِ يُمَتِّعۡكُمۡ مَّتَاعًا حَسَنًا اِلٰٓى اَجَلٍ مُّسَمًّى وَّيُؤۡتِ كُلَّ ذِىۡ فَضۡلٍ فَضۡلَهٗ ؕ وَاِنۡ تَوَلَّوۡا فَاِنِّىۡۤ اَخَافُ عَلَيۡكُمۡ عَذَابَ يَوۡمٍ كَبِيۡرٍ ④

4. තවද නුඹලාගේ අධිපතියාණන්ගෙන් සමාව අයැදිනු පිණිසය. (තවද) ඔහු වෙත හැරෙනු. ඔහු නියමිත කාලයක් වනතුරු නුඹලාට යහපත් ජීවනෝපාය ලබා දෙන්නේය. තවද ආශිර්වාදයට හිමි සෑම දෙනාටම ඔහුගේ ආශිර්වාදය ඔහු ලබා දෙන්නේය. තවද නුඹලා පිටුපාන්නේ නම් නියතවශයෙන්ම නුඹලාට අතිමහත්වූ දිනයේ දඬුවම පිළිබඳ මම බියවෙමි.

اِلَى اللّٰهِ مَرۡجِعُكُمۡ‌ ۚ وَهُوَ عَلٰى كُلِّ شَىۡءٍ قَدِيۡرٌ ⑤

5. නුඹලාගේ ආපසු පැමිණීම අල්ලාහ් වෙතය. තවද ඔහු සියළු දේ කෙරෙහි බලසම්පන්නය.

اَلَاۤ اِنَّهُمۡ يَثۡنُوۡنَ صُدُوۡرَهُمۡ لِيَسۡتَخۡفُوۡا مِنۡهُ‌ ؕ اَلَا حِيۡنَ يَسۡتَغۡشُوۡنَ ثِيَابَهُمۡ ۙ يَعۡلَمُ مَا يُسِرُّوۡنَ وَمَا يُعۡلِنُوۡنَ‌ ۚ اِنَّهٗ عَلِيۡمٌۢ بِذَاتِ الصُّدُوۡرِ ⑥

6. දැනගනු, නියතවශයෙන්ම ඔවුන් ඔහුගෙන් සැඟවී සිටීම පිණිස ඔවුන් සිය හදවත් හකුළා ගනිති. අවධාරණයයි, ඔවුන් සිය වස්ත්‍රවලින් තමන්ව ආවරණය කළ (වුව)ද ඔවුන් සඟවන දේත් ඔවුන් හෙළිකරන දේත් ඔහු දනියි. නියතවශයෙන්ම (ඔවුන්ගේ) හදවත්තුල ඇති දේ ඔහු මැනැවින් දනියි.

◆මම අල්ලාහ්, සියල්ල දකින්නා වෙමි.

12 කොටස

7. තවද තම ජීවනෝපාය අල්ලාහ්ගෙන් හැරෙන්නට සලස්වා ගන්නා පොළොවෙහි සැරිසරන කිසිඳු ප්‍රාණියෙක් නැත. තවද එයගේ තාවකාලික රැඳෙන ස්ථානයද, ස්ථිර වාසස්ථානයද ඔහු දන්නේය. (මේ) සියල්ල පැහැදිලි ග්‍රන්ථයක (සටහන් කර) ඇත.

وَمَا مِن دَآبَّةٍ فِى ٱلْأَرْضِ إِلَّا عَلَى ٱللَّهِ رِزْقُهَا وَيَعْلَمُ مُسْتَقَرَّهَا وَمُسْتَوْدَعَهَا ۚ كُلٌّ فِى كِتَٰبٍ مُّبِينٍ ﴿٧﴾

8. තවද කාලපරිච්ඡේද හයක් තුළ අහස් සහ පොළොව මැව්වේ ඔහුමය. තවද ඔහුගේ සිහසුන ජලය මතය. එය නුඹලාගෙන් කවුරුන් චර්‍යාවෙහි වඩාත් හොඳම අයදැයි ඔහු නුඹලාව පරීක්ෂා කර (බල)න්නටය. තවද 'මරණින් පසු නියතවශයෙන්ම නුඹලා නැගිටවනු ලබන්නෙහුයැ.' යි ඔබ කිවහොත් 'මෙය අන් කිසිවක් නොව පැහැදිලිවම ඉන්ද්‍රජාලයක් වේ' යැයි අවිශ්වාසිතයින් නියතවශයෙන්ම කියන්නෝය.

وَهُوَ ٱلَّذِى خَلَقَ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضَ فِى سِتَّةِ أَيَّامٍ وَكَانَ عَرْشُهُۥ عَلَى ٱلْمَآءِ لِيَبْلُوَكُمْ أَيُّكُمْ أَحْسَنُ عَمَلًا ۗ وَلَئِن قُلْتَ إِنَّكُم مَّبْعُوثُونَ مِنۢ بَعْدِ ٱلْمَوْتِ لَيَقُولَنَّ ٱلَّذِينَ كَفَرُوٓا۟ إِنْ هَٰذَآ إِلَّا سِحْرٌ مُّبِينٌ ﴿٨﴾

9. තවද නියමිත කාලය තෙක් අප ඔවුන්ගේ දඬුවම කල් දැමුවහොත් 'මෙය ප්‍රමාද කරන්නේ කුමක්දැ?' යි ඔවුන් නියතවශයෙන්ම කියනු ඇත. දැනගනු! නියත වශයෙන්ම එය ඔවුන් කරා පැමිණෙන දිනයෙහිදී ඔවුන්ගෙන් එය වළක්වනු නොලබන්නේය. තවද ඔවුන් සරදම් කරමින් සිටි දේ ඔවුන්ව වෙළාගනු ඇත.

وَلَئِنْ أَخَّرْنَا عَنْهُمُ ٱلْعَذَابَ إِلَىٰٓ أُمَّةٍ مَّعْدُودَةٍ لَّيَقُولُنَّ مَا يَحْبِسُهُۥٓ ۗ أَلَا يَوْمَ يَأْتِيهِمْ لَيْسَ مَصْرُوفًا عَنْهُمْ وَحَاقَ بِهِم مَّا كَانُوا۟ بِهِۦ يَسْتَهْزِءُونَ ﴿٩﴾

10. තවද අප මිනිසාට අපගේ දයාව විඳීමට සලස්වා අනතුරුව එය ඔහුගෙන් ඉවත් කරන්නේ නම්, සැබැවින්ම ඔහු බලාපොරොත්තු සුන්වූවකු මෙන්ම අකෘතඥවූවකු වේ.

وَلَئِنْ أَذَقْنَا ٱلْإِنسَٰنَ مِنَّا رَحْمَةً ثُمَّ نَزَعْنَٰهَا مِنْهُ إِنَّهُۥ لَيَـُٔوسٌ كَفُورٌ ﴿١٠﴾

11. තවද ඔහුට විපත අත්වූවායින් පසුව අප ඔහුට සෞභාග්‍යය විඳින්නට සලස්වන්නේ නම්, 'මාගෙන් පිඩාවන් බැහැරවී ඇතැ.'යි සහතිකවම ඔහු කියන්නේය. බලනු! ඔහු ප්‍රීතියෙන් කුල්මත් වන්නේය, පුරසාරම් දොඩවන්නේය.

وَلَئِنْ أَذَقْنَٰهُ نَعْمَآءَ بَعْدَ ضَرَّآءَ مَسَّتْهُ لَيَقُولَنَّ ذَهَبَ ٱلسَّيِّـَٔاتُ عَنِّىٓ ۚ إِنَّهُۥ لَفَرِحٌ فَخُورٌ ﴿١١﴾

إِلَّا الَّذِينَ صَبَرُوا وَعَمِلُوا الصّٰلِحٰتِ ۗ أُولٰٓئِكَ لَهُم مَّغْفِرَةٌ وَّأَجْرٌ كَبِيرٌ ﴿١٢﴾

12. ස්ථිරසාරව සිටිමින් යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන් හැරෙන්නටය. ක්ෂමාව මෙන්ම මහත්වූ තිළිණය ලැබෙන්නේ ඔවුන්ටමය.

فَلَعَلَّكَ تَارِكٌۢ بَعْضَ مَا يُوحٰىٓ إِلَيْكَ وَضَآئِقٌۢ بِهٖ صَدْرُكَ أَن يَقُولُوا لَوْلَآ أُنزِلَ عَلَيْهِ كَنزٌ أَوْ جَآءَ مَعَهٗ مَلَكٌ ۗ إِنَّمَآ أَنتَ نَذِيرٌ ۗ وَاللّٰهُ عَلٰى كُلِّ شَيْءٍ وَّكِيلٌ ﴿١٣﴾

13. එබැවින් ඔබ වෙත අනාවරණය කරන ලද දෙයින් කොටසක් ඇතැම් විට ඔබ අත්හැර දමනු ඇත. (යැයි ඔවුහු කල්පනා කරති.) තවද 'ඔහු වෙත නිධානයක් පහළ නොකරන ලද්දේ හෝ සුරදූතයෙකු ඔහු සමඟ නොපැමිණියේ මක් නිසාදැ?'යි ඔවුන් පවසන නිසා ඔබගේ සිත එමගින් පීඩනයට පත්වෙයි. සැබැවින්ම, ඔබ අවවාදකරන්නෙකු පමණි. තවද අල්ලාහ් සියළු දේ කෙරෙහි සුපරීක්ෂකයාය.

أَمْ يَقُولُونَ افْتَرٰىهُ ۗ قُلْ فَأْتُوا بِعَشْرِ سُوَرٍ مِّثْلِهٖ مُفْتَرَيٰتٍ وَّادْعُوا مَنِ اسْتَطَعْتُم مِّن دُونِ اللّٰهِ إِن كُنتُمْ صٰدِقِينَ ﴿١٤﴾

14. 'ඔහු එය ගොතා ඇතැ'යි ඔවුන් කියන්නේද? පවසන්න, 'එසේනම් ගොතන ලද මෙවන් පරිච්ඡේද (සූරතයන්) දහයක් ගෙන එනු තවද අල්ලාහ් හැර නුඹලාට හැකි අයෙකුව කැඳවනු, නුඹලා සත්‍යවාදීන් නම්'.

فَإِلَّمْ يَسْتَجِيبُوا لَكُمْ فَاعْلَمُوٓا أَنَّمَآ أُنزِلَ بِعِلْمِ اللّٰهِ وَأَن لَّآ إِلٰهَ إِلَّا هُوَ ۚ فَهَلْ أَنتُم مُّسْلِمُونَ ﴿١٥﴾

15. තවද ඔවුන් නුඹලා වෙත ප්‍රතිචාර නොදක්වන්නේ නම් එවිට එය අල්ලාහ්ගේ (පූර්ණ) නුවණින් අනාවරණය කරන ලද බවත් නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නොමැති බවත් දැනගනු. එබැවින් නුඹලා අවනත වන්නෙහුද?

مَن كَانَ يُرِيدُ الْحَيٰوةَ الدُّنْيَا وَزِينَتَهَا نُوَفِّ إِلَيْهِمْ أَعْمٰلَهُمْ فِيهَا وَهُمْ فِيهَا لَا يُبْخَسُونَ ﴿١٦﴾

16. මෙලොව ජීවිතයට මෙන්ම එහි අලංකාරයට කවුරුන් හෝ කැමති වන්නේද, ඔවුන්ගේ ක්‍රියාවන් වෙනුවෙන් මෙ(ම ජීවිතයේ)හිදි අපි ඔවුන්ට සම්පූර්ණ ලෙස ගෙවන්නෙමු. තවද ඔවුනට එයින් අඩුවක් සිදු නොකරනු ඇත.

17. ගින්න හැර පරලොවෙහි අන් දෙයක් නොලබන අය ඔවුන්මය. මෙ(ම ජීවිතයේ)හිදි ඔවුන් කරමින් සිටි දේ ශූන්‍යය බවට පත්වනු ඇත. එමෙන්ම ඔවුන් ක්‍රියා කරමින් සිටි දේ ඔවුන්ට නිශ්චල වනු ඇත.

أُولَٰئِكَ الَّذِينَ لَيْسَ لَهُمْ فِي الْآخِرَةِ إِلَّا النَّارُ ۖ وَحَبِطَ مَا صَنَعُوا فِيهَا وَبَاطِلٌ مَا كَانُوا يَعْمَلُونَ ﴿١٧﴾

*18. තම අධිපතියාණන්ගෙන් පැහැදිලි සාධකයක් (හිමි)වද, ඔහු වෙතින්, (තමාගේ සත්‍යතාවය තහවුරු කර) තමාව අනුගමනය කරන්නාවූ සාක්ෂිකරුවෙක්ව ලැබූවෙක්ද මගපෙන්වීමක් හා කරුණාවක් වන මූසාගේ පුස්තකය මගින් කලින් තහවුරු කරනු ලැබූ ඔහු (බොරුකාරයෙකු) විය හැකිද? ඔවුන් ඔහුව විශ්වාස කරති. තවද විවිධ නිකායන් අතුරින් යමෙක් ඔහුව ප්‍රතික්ෂේප කරන්නේද, ඔහුගේ පොරොන්දු වූ වාසස්ථානය ගින්න වනු ඇත. එබැවින් එය ගැන සැකයෙහි නොවන්න. නියතවශයෙන්ම එය ඔබගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යයකි. නමුත් බොහෝ ජනතාවන් විශ්වාස නොකරති.

أَفَمَنْ كَانَ عَلَىٰ بَيِّنَةٍ مِنْ رَبِّهِ وَيَتْلُوهُ شَاهِدٌ مِنْهُ وَمِنْ قَبْلِهِ كِتَابُ مُوسَىٰ إِمَامًا وَرَحْمَةً ۚ أُولَٰئِكَ يُؤْمِنُونَ بِهِ ۚ وَمَنْ يَكْفُرْ بِهِ مِنَ الْأَحْزَابِ فَالنَّارُ مَوْعِدُهُ ۚ فَلَا تَكُ فِي مِرْيَةٍ مِنْهُ ۚ إِنَّهُ الْحَقُّ مِنْ رَبِّكَ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يُؤْمِنُونَ ﴿١٨﴾

19. තවද අල්ලාහ්ට විරුද්ධව බොරු ගොතන්නාට වඩා අදමිටුවා වන්නේ කවරෙක්ද? එවැන්නෝ ඔවුන්ගේ අධිපතියාණන් හමුවට පමුණුවනු ලබන්නෝය. තවද 'සිය අධිපතියාණන්ට විරුද්ධව බොරු ගෙතූ අය මොවුහු වෙති' යි සාක්ෂිකරුවෝ කියන්නෝය. බලනු! නියතවශයෙන්ම අල්ලාහ්ගේ ශාපය අදමිටුවන් මත වේ.

وَمَنْ أَظْلَمُ مِمَّنِ افْتَرَىٰ عَلَى اللَّهِ كَذِبًا ۚ أُولَٰئِكَ يُعْرَضُونَ عَلَىٰ رَبِّهِمْ وَيَقُولُ الْأَشْهَادُ هَٰؤُلَاءِ الَّذِينَ كَذَبُوا عَلَىٰ رَبِّهِمْ ۚ أَلَا لَعْنَةُ اللَّهِ عَلَى الظَّالِمِينَ ﴿١٩﴾

*සටහන. 18: ශුද්ධ වක්තෘ මුහම්මද් (අල්ලාහ්ගේ ශාන්තිය සහ සමාදානය ඔහුට අත්වේවා) තුමාණන්ගේ උම්මතයෙන් (ජන සමූහයෙන්) කෙනෙකු පැමිණෙනු ඇත. ඔහු තමාට ලැබෙන දේව අනාවරණයන් මගින් එතුමාණන්ගේ සත්‍යතාවය තහවුරු කරන්නේය. එනම් ශුද්ධ වක්තෘ මුහම්මද් තුමාණන්ට සාක්ෂීන් තුනක් ඇත. එයින් පළමුවැන්න එතුමාණන් තමන්ටම සාධක හිමියෙකු ලෙස සිටින්නේය. දෙවනුව එතුමාණන්ගේ උම්මතයෙහි අව්ලියාවරුන් (සාන්තුවරුන්) පැමිණ එතුමාණන්ගේ සත්‍යතාවයට සාක්ෂි දරමින් සිටින්නෝය. මොවුන්ගෙන් විශිෂ්ඨතමයා වන්නේ පොරොන්දු වූ මෙසායා (අලෛ)ය. තෙවනුව මෙයට පෙරද මූසා (අලෛ)ගේ පුස්තකය එතුමාණන්ගේ සත්‍යතාවයට සාක්ෂි දරමින් තිබුණේය. මෙතරම් සාක්ෂීන් කිසිම නබිවරයෙකුට ලැබුණේ නැත.

الَّذِيۡنَ يَصُدُّوۡنَ عَنۡ سَبِيۡلِ اللّٰهِ وَيَبۡغُوۡنَهَا عِوَجًا ؕ وَهُمۡ بِالۡاٰخِرَةِ هُمۡ كٰفِرُوۡنَ ۝٢٠

20. මොවුහු අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වමින්ද, එය ඇද කිරීමටද තැත්කරති. තවද පරලොව ගැන විශ්වාස නොකරන්නෝ මොවුහුමය.

اُولٰٓٮِٕكَ لَمۡ يَكُوۡنُوۡا مُعۡجِزِيۡنَ فِى الۡاَرۡضِ وَمَا كَانَ لَهُمۡ مِّنۡ دُوۡنِ اللّٰهِ مِنۡ اَوۡلِيَآءَ ‌ۘ يُضٰعَفُ لَهُمُ الۡعَذَابُ‌ ؕ مَا كَانُوۡا يَسۡتَطِيۡعُوۡنَ السَّمۡعَ وَمَا كَانُوۡا يُبۡصِرُوۡنَ ۝٢١

21. මෙවන් අයට පොළොවෙහි (අල්ලාහ්ගේ සැලසුම්) නිෂ්ඵල කිරීම කිසිවිටෙකත් කළ නොහැක. එමෙන්ම අල්ලාහ් හැරෙන්නට කිසිඳු මිතුරෙක් මොවුන්ට නොවන්නේය. දඬුවම මොවුන් වෙනුවෙන් දෙගුණ කරනු ලබන්නේය. මොවුන්ට ඇසීමටද නොහැක. මොවුන්ට දැකීමටද නොහැක.

اُولٰٓٮِٕكَ الَّذِيۡنَ خَسِرُوۡۤا اَنۡفُسَهُمۡ وَضَلَّ عَنۡهُمۡ مَّا كَانُوۡا يَفۡتَرُوۡنَ ۝٢٢

22. සිය ආත්මයන් විනාශකර ගත්තෝ මොවුහුම වෙති. තවද මොවුන් ගෙතූ දේ මොවුන්ගෙන් ගිලිහී යනු ඇත.

لَا جَرَمَ اَنَّهُمۡ فِى الۡاٰخِرَةِ هُمُ الۡاَخۡسَرُوۡنَ ۝٢٣

23. නිසැකවම පරලොවෙහි අන්ත පරාජිතයෝ වන්නේ මොවුහුමය.

اِنَّ الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ وَاَخۡبَتُوۡۤا اِلٰى رَبِّهِمۡ ۙ اُولٰٓٮِٕكَ اَصۡحٰبُ الۡجَـنَّةِ‌ ۚ هُمۡ فِيۡهَا خٰلِدُوۡنَ ۝٢٤

24. සැබැවින්ම විශ්වාස කරමින්ද, යහපත් ක්‍රියාවන් කරමින්ද, සිය අධිපතියාණන් වෙත නිහතමානි වන්නන් ඔවුන්මය. ස්වර්ගයේ වැසියන් ඔවුහුමය. එහිම ඔවුහු වෙසෙන්නෝය.

مَثَلُ الۡفَرِيۡقَيۡنِ كَالۡاَعۡمٰى وَالۡاَصَمِّ وَالۡبَصِيۡرِ وَالسَّمِيۡعِ‌ ؕ هَلۡ يَسۡتَوِيٰنِ مَثَلًا‌ ؕ اَفَلَا تَذَكَّرُوۡنَ ۝٢٥

25. දෙපිරිස්හි උපමාව අන්ධයා සහ බිහිරාටද, දකින්නා සහ අසන්නාටද, බඳුය. මේ දෙදෙනාගේ උපමාව සමානවේද? එහෙයින් නුඹලා තේරුම් නොගන්නෙහුද?

26. තවද අපි නූහ්ව ඔහුගේ ජනතාව වෙත යැව්මු. (තවද) 'ඇත්තෙන්ම මම නුඹලා වෙත පැහැදිලි අවවාදකරන්නෙකු වෙමි.'(යි ඔහු කීවේය.)

وَلَقَدْ أَرْسَلْنَا نُوحًا إِلَىٰ قَوْمِهِ إِنِّي لَكُمْ نَذِيرٌ مُبِينٌ ﴿٢٦﴾

27. 'එනම් අල්ලාහ් හැර අන් කිසිවෙකුව නුඹලා නොනමදිනු. සත්තකින්ම නුඹලාට වේදනීය දිනයේ දඬුවම කෙරෙහි මම බිය වෙමි.'

أَنْ لَا تَعْبُدُوا إِلَّا اللَّهَ ۖ إِنِّي أَخَافُ عَلَيْكُمْ عَذَابَ يَوْمٍ أَلِيمٍ ﴿٢٧﴾

28. ඔහුගේ ජනයාගේ අවිශ්වාස කළ ප්‍රධානිහු, 'අප ඔබ තුල දකින්නේ අප මෙන්ම මිනිසෙකු මිස අන් කිසිවක් නොවේ. එමෙන්ම අපගෙන් සිටින බාහිර ලක්ෂණයෙන් පහත්ම අය හැරෙන්නට අන් කිසිවෙක් ඔබව අනුගමනය කර ඇති බවක් අපි නොදකිමු. තවද අපට වඩා කිසිඳු උසස් තත්වයක්ද අපි ඔබලා තුල නොදකිමු. එහෙත් නුඹලා බොරුකාරයින් බවට අපි සිතන්නෙමු'යි පිළිතුරු දුන්හ.

فَقَالَ الْمَلَأُ الَّذِينَ كَفَرُوا مِنْ قَوْمِهِ مَا نَرَاكَ إِلَّا بَشَرًا مِثْلَنَا وَمَا نَرَاكَ اتَّبَعَكَ إِلَّا الَّذِينَ هُمْ أَرَاذِلُنَا بَادِيَ الرَّأْيِ وَمَا نَرَىٰ لَكُمْ عَلَيْنَا مِنْ فَضْلٍ بَلْ نَظُنُّكُمْ كَاذِبِينَ ﴿٢٨﴾

29. ඔහු (මෙසේ) කීවේය. 'එම්බල මාගේ ජනතාවනි, මට කියනු, මාගේ අධිපතියාණන් වෙතින් පැහැදිලි සාධකයක් මත මා සිටින්නේ නම් එමෙන්ම නුඹලාට නොපෙනෙන අතිමහත්වූ දයාවක් ඔහු වෙතින් මා වෙත ඔහු පිරිනමා ඇත්නම් නුඹලා එයට අකමැතිව සිටිනවිට අප නුඹලාට එය බලකරන්නෙමුද?'.

قَالَ يَا قَوْمِ أَرَأَيْتُمْ إِنْ كُنْتُ عَلَىٰ بَيِّنَةٍ مِنْ رَبِّي وَآتَانِي رَحْمَةً مِنْ عِنْدِهِ فَعُمِّيَتْ عَلَيْكُمْ أَنُلْزِمُكُمُوهَا وَأَنْتُمْ لَهَا كَارِهُونَ ﴿٢٩﴾

30. 'තවද එම්බල මාගේ ජනතාවනි! මම එය වෙනුවෙන් නුඹලාගෙන් කිසිඳු වස්තුවක් නොඉල්ලමි. මාගේ තිළිණය අල්ලාහ් වෙතින් මිස, නැත. තවද මම විශ්වාස කරන අයව පළවා හරින්නෙක් නොවෙමි. නියතවශයෙන්ම ඔවුහු සිය අධිපතියාණන්ව හමුවන්නන් වන්නෝය. නමුත් නුඹලා අඥානව ක්‍රියා කරන ජනතාවක් ලෙස මම දකිමි.'

وَيَا قَوْمِ لَا أَسْأَلُكُمْ عَلَيْهِ مَالًا ۖ إِنْ أَجْرِيَ إِلَّا عَلَى اللَّهِ ۚ وَمَا أَنَا بِطَارِدِ الَّذِينَ آمَنُوا ۚ إِنَّهُمْ مُلَاقُو رَبِّهِمْ وَلَٰكِنِّي أَرَاكُمْ قَوْمًا تَجْهَلُونَ ﴿٣٠﴾

31. 'තවද එම්බල මාගේ ජනතාවනි! මා ඔවුන්ව පළවා හැරියා නම් අල්ලාහ් වෙතින් මට උදව්කරන්නේ කවරෙක්ද? එසේනම් නුඹලා මෙනෙහි නොකරන්නෙහුද?'

وَيٰقَوۡمِ مَنۡ يَّنۡصُرُنِىۡ مِنَ اللّٰهِ اِنۡ طَرَدْتُّهُمۡ‌ؕ اَفَلَا تَذَكَّرُوۡنَ ۝٣١

32. "තවද 'අල්ලාහ්ගේ නිධානයන් මා සතු යැයිද අදෘශ්‍යමාන දෙය මම දනිමි යැයිද.' මම නුඹලාට නොකියමි. තවද 'මම සුරදූතයෙක් වෙමි.' යැයි මම නොකියමි. තවද නුඹලාගේ ඇස් නිච ලෙස සළකන අය සම්බන්ධයෙන් 'අල්ලාහ් ඔවුනට කිසිඳු යහපතක් නොපිරිනමන්නේය.' යිද මම නොකියමි. ඔවුන්ගේ සිත්තුල ඇතිදේ අල්ලාහ් හොඳින් දන්නේය. (නුඹලා කියන දෙයම මා කිවහොත්) එවිට මා නියතවශයෙන්ම අයුක්තිකරුවන්ගෙන් වන්නෙමි".

وَلَاۤ اَقُوۡلُ لَـكُمۡ عِنۡدِىۡ خَزَآئِنُ اللّٰهِ وَلَاۤ اَعۡلَمُ الۡغَيۡبَ وَلَاۤ اَقُوۡلُ اِنِّىۡ مَلَكٌ وَّلَاۤ اَقُوۡلُ لِلَّذِيۡنَ تَزۡدَرِىۡۤ اَعۡيُنُكُمۡ لَنۡ يُّؤۡتِيَهُمُ اللّٰهُ خَيۡرًا‌ؕ اَللّٰهُ اَعۡلَمُ بِمَا فِىۡۤ اَنۡفُسِهِمۡ‌ ۖۚ اِنِّىۡۤ اِذًا لَّمِنَ الظّٰلِمِيۡنَ ۝٣٢

33. 'එම්බල නූහ්! ඔබ (දීර්ඝව) සත්තකින්ම අප හා විවාද කළෙහිය. තවද ඔබ අප හා බොහෝ වතාවක් විවාද කර ඇත්තෙහිය. ඔබ සත්‍ය කථාකරන අයගෙන් වේ නම් ඔබ අපට බිය ගන්වන දේ අප වෙත දැන් ගෙන එන්නැ.' යි ඔවුහු කීහ.

قَالُوۡا يٰنُوۡحُ قَدۡ جَادَلۡتَنَا فَاَكۡثَرۡتَ جِدَالَنَا فَاۡتِنَا بِمَا تَعِدُنَاۤ اِنۡ كُنۡتَ مِنَ الصّٰدِقِيۡنَ ۝٣٣

34. 'එය නුඹලා වෙත ගෙන එන්නේ අල්ලාහ්මය, ඔහු අභිමත නම්. තවද (අල්ලාහ්ගේ අරමුණ) නුඹලාට නිෂ්ඵල කරන්නට නොහැක.' යැයි ඔහු කීවේය.

قَالَ اِنَّمَا يَاۡتِيۡكُمۡ بِهِ اللّٰهُ اِنۡ شَآءَ وَمَاۤ اَنۡتُمۡ بِمُعۡجِزِيۡنَ ۝٣٤

35. 'තවද අල්ලාහ් නුඹලාව විනාශ කිරීමට අදහස් කරන්නේ නම් නුඹලාට මා කෙතරම් අනුශාසනා කිරීමට කැමති වුවද මාගේ අනුශාසනාව නුඹලාට එලක් නොදෙන්නේමය. ඔහු නුඹලාගේ අධිපතියාණන්ය. තවද ඔහු වෙතම නුඹලාගේ ආපසු පැමිණීම වන්නේය'.

وَلَا يَنۡفَعُكُمۡ نُصۡحِىۡۤ اِنۡ اَرَدْتُّ اَنۡ اَنۡصَحَ لَـكُمۡ اِنۡ كَانَ اللّٰهُ يُرِيۡدُ اَنۡ يُّغۡوِيَكُمۡ‌ؕ هُوَ رَبُّكُمۡ وَاِلَيۡهِ تُرۡجَعُوۡنَ ؕ ۝٣٥

اَمۡ يَقُوۡلُوۡنَ افۡتَرٰٮهُ ؕ قُلۡ اِنِ افۡتَرَيۡتُهٗ فَعَلَىَّ اِجۡرَامِىۡ وَاَنَا بَرِىۡٓءٌ مِّمَّا تُجۡرِمُوۡنَ ۝٣٦

36. 'ඔහු එය ගොතා ඇත්තේයැ'යි ඔවුන් කියන්නෝද? 'මා එය ගොතා ඇත්නම් මාගේ පාපය මා කෙරෙහි වන්නේය. තවද නුඹලා කරන පව්වලින් මම නිදහස් වෙමි.'යි පවසන්න.

وَاُوۡحِىَ اِلٰى نُوۡحٍ اَنَّهٗ لَنۡ يُّؤۡمِنَ مِنۡ قَوۡمِكَ اِلَّا مَنۡ قَدۡ اٰمَنَ فَلَا تَبۡتَئِسۡ بِمَا كَانُوۡا يَفۡعَلُوۡنَ ۝٣٧

37. තවද 'දැනටමත් විශ්වාස කළ අය හැරෙන්නට ඔබගේ ජනතාවගෙන් අන්කිසිවෙක් විශ්වාස නොකරන්නෝය. එමනිසා ඔවුන් කරමින් සිටිදේ පිළිබඳව දුක්නොවන්නැ.'යි නූහ් වෙත අනාවරණය කරන ලදි.

وَاصۡنَعِ الۡفُلۡكَ بِاَعۡيُنِنَا وَوَحۡيِنَا وَلَا تُخَاطِبۡنِىۡ فِى الَّذِيۡنَ ظَلَمُوۡا ۚ اِنَّهُمۡ مُّغۡرَقُوۡنَ ۝٣٨

38. 'තවද ඔබ අපගේ අනාවරණය (මගින් අණ කළ පරිදි) අපගේ ඇස් ඉදිරිපිටදී නැවක් තනන්න. තවද වරදකරුවන් සම්බන්ධයෙන් මාහට කථා නොකරන්න. නියතවශයෙන්ම ඔවුන් ගිල්වනු ලබන්නෝය'.

وَيَصۡنَعُ الۡفُلۡكَ وَكُلَّمَا مَرَّ عَلَيۡهِ مَلَاٌ مِّنۡ قَوۡمِهٖ سَخِرُوۡا مِنۡهُ ؕ قَالَ اِنۡ تَسۡخَرُوۡا مِنَّا فَاِنَّا نَسۡخَرُ مِنۡكُمۡ كَمَا تَسۡخَرُوۡنَ ؕ ۝٣٩

39. තවද ඔහු නැව තනමින් සිටියේය. තවද ඔහුගේ ජනතාවගේ ප්‍රධානීන් ඔහුව පසුකර යන හැමවිටම, ඔවුන් ඔහුට සරදම් කළෝය. 'නුඹලා (දැන්) අපට සරදම් කරන්නේ නම්, (අවස්ථාවක් උදාවනු ඇත එවිට) නුඹලා (දැන්) සරදම් කරන පරිද්දිම අපිද නුඹලාට සරදම් කරන්නෙමු.'යි ඔහු කීවේය.

فَسَوۡفَ تَعۡلَمُوۡنَ ۙ مَنۡ يَّاۡتِيۡهِ عَذَابٌ يُّخۡزِيۡهِ وَيَحِلُّ عَلَيۡهِ عَذَابٌ مُّقِيۡمٌ‏ ۝٤٠

40. 'කවරෙකුට දඬුවමක් පැමිණ එය ඔහුව නින්දාවට පත්කරන්නේ යැයිද, ස්ථිර දඬුවමක් කවරෙකු මත පහළ වන්නේ යැයිද පසුව නුඹලා දැනගන්නෙහුමය.'

حَتّٰٓى اِذَا جَآءَ اَمۡرُنَا وَفَارَ التَّنُّوۡرُ ۙ قُلۡنَا احۡمِلۡ فِيۡهَا مِنۡ كُلٍّ زَوۡجَيۡنِ اثۡنَيۡنِ

41. අවසානයේදී අපගේ අණ පැමිණ (පොළොවෙහි) ජල උල්පත් පැනනැගී එනවිට, 'ස්ත්‍රී සහ පුරුෂ හැම වර්ගයෙන්ම දෙක බැගින්ද,

وَاَهۡلَكَ اِلَّا مَنۡ سَبَقَ عَلَيۡهِ الۡقَوۡلُ وَمَنۡ اٰمَنَ‌ ؕ وَمَاۤ اٰمَنَ مَعَهٗۤ اِلَّا قَلِيۡلٌ ﴿۴۱﴾

යමෙකුට විරුද්ධව තීන්දුව දැනටමත් පැමිණ ඇත්තේද ඒ අය හැරෙන්නට ඔබගේ පවුලද, එමෙන්ම විශ්වාස කරන අයවද (නැවට) පටවාගන්නැ.'යි අපි කීවෙමු. තවද ස්වල්ප දෙනෙක් හැරෙන්නට ඔහු සමග (ජීවත්වූ අන් අය) විශ්වාස නොකළහ.

وَقَالَ ارۡكَبُوۡا فِيۡهَا بِسۡمِ اللّٰهِ مَجۡرٖٮہَا وَمُرۡسٰٮہَا‌ ؕ اِنَّ رَبِّىۡ لَـغَفُوۡرٌ رَّحِيۡمٌ ﴿۴۲﴾

قرأ حفص بفتح الميم وإمالة الراء

42. තවද 'එයට ගොඩවනු. එහි ගමන් ඇරඹුමද එහි නැවතුමද අල්ලාහ්ගේ නාමයෙනි. සැබැවින්ම මාගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරයැ.' යි ඔහු කීවේය.

وَهِىَ تَجۡرِىۡ بِهِمۡ فِىۡ مَوۡجٍ كَالۡجِبَالِ وَنَادٰى نُوۡحُ ۨابۡنَهٗ وَكَانَ فِىۡ مَعۡزِلٍ يّٰبُنَىَّ ارۡكَبْ مَّعَنَا وَلَا تَكُنۡ مَّعَ الۡكٰفِرِيۡنَ ﴿۴۳﴾

43. තවද එය කඳු වැනි රළ මත ඔවුන්ව රැගෙන නික්ම ගියේය. තවද නූහ් තම පුත්‍රයාට, ඔහු (පුත්‍රයා) වෙන්වී සිටි අතරතුරදී 'එම්බල මාගේ පුත්‍රයාණනි! අප සමඟ (නැවට) ගොඩවන්න. තවද අවිශ්වාසීන් සමඟ නොවන්නැ'යි හඬගැසුවේය.

قَالَ سَاٰوِىۡۤ اِلٰى جَبَلٍ يَّعۡصِمُنِىۡ مِنَ الۡمَآءِ‌ ؕ قَالَ لَا عَاصِمَ الۡيَوۡمَ مِنۡ اَمۡرِ اللّٰهِ اِلَّا مَنۡ رَّحِمَ‌ ۚ وَحَالَ بَيۡنَهُمَا الۡمَوۡجُ فَكَانَ مِنَ الۡمُغۡرَقِيۡنَ ﴿۴۴﴾

44. 'ජලයෙන් මා රැක ගන්නාවූ කන්දක් දෙසට මා රැකවරණය (සොයා) ගනිමි.'යි ඔහු පිළිතුරු දුන්නේය. 'අල්ලාහ්ගේ නියමයෙන් ඔහු දයාව දක්වන අය හැරෙන්නට (අන් කිසිවෙකුට) අද දිනයේ ආරක්ෂාවක් නැතැ'යි ඔහු (නූහ්) කීවේය. තවද ඔවුන් දෙදෙනා අතරට රළ පැමිණියේය. එහෙයින් ඔහු ගිල්වනු ලැබූවන් අතරට පත්විය.

وَقِيۡلَ يٰۤاَرۡضُ ابۡلَعِىۡ مَآءَكِ وَيٰسَمَآءُ اَقۡلِعِىۡ وَغِيۡضَ الۡمَآءُ وَقُضِىَ الۡاَمۡرُ وَاسۡتَوَتۡ عَلَى الۡجُوۡدِىِّ‌ وَقِيۡلَ بُعۡدًا لِّلۡقَوۡمِ الظّٰلِمِيۡنَ ﴿۴۵﴾

45. තවද 'අහෝ පොළොව! නුඹගේ ජලය ගිලගනු. තවද අහෝ අහස! (වැස්ස) නවත්වා ගනු!' යැයි පවසන ලදී. තවද ජලය බැසයාමට සලස්වන ලදී. තවද කටයුත්ත අවසානයට පත් කරන ලදී. තවද (නැව) අල්ජූදිහි රැඳුණි. තවද 'වැරදිකරන ජනතාවට ශාපවේවා!'යි පවසන ලදී.

وَنَادٰى نُوۡحٌ رَّبَّهٗ فَقَالَ رَبِّ اِنَّ ابۡنِىۡ مِنۡ اَهۡلِىۡ وَاِنَّ وَعۡدَكَ الۡحَـقُّ وَاَنۡتَ اَحۡكَمُ الۡحٰكِمِيۡنَ ﴿۴۶﴾

46. තවද 'මාගේ අධිපතියාණනි! ඇත්තෙන්ම මාගේ පුත්‍රයා මාගේ පවුලෙන්ය. තවද නියතවශයෙන්ම ඔබගේ පොරොන්දුව සත්‍ය වේ. තවද ඔබ විනිශ්චයකරුවන්ගෙන් අතිශයින්ම සාධාරණයැ.'යි නූහ් තම අධිපතියාණන් හට හඬ නංවා කිවේය.

قَالَ يٰـنُوۡحُ اِنَّهٗ لَـيۡسَ مِنۡ اَهۡلِكَ‌ ۚ اِنَّهٗ عَمَلٌ غَيۡرُ صَالِحٍ‌ ۖ فَلَا تَسۡـئَلۡنِ مَا لَـيۡسَ لَـكَ بِهٖ عِلۡمٌ‌ ؕ اِنِّىۡۤ اَعِظُكَ اَنۡ تَكُوۡنَ مِنَ الۡجٰهِلِيۡنَ ﴿۴۷﴾

47. 'එම්බල නූහ්, ඔහු නියතවශයෙන්ම ඔබගේ පවුලෙන් නොවේ. ඔහු සත්තකින්ම අධර්මිෂ්ඨ පැවැත්මක් (ඇති මිනිසෙක්) වන්නේය. එබැවින්, ඔබට දැනුමක් නැතිදේ පිළිබඳව මාගෙන් නොඅසන්න. ඔබ අඥානයන්ගෙන් (කෙනෙකු) නොවනු පිණිස මම ඔබට අවවාද කරමි.'යි ඔහු කිවේය.

قَالَ رَبِّ اِنِّىۡۤ اَعُوۡذُ بِكَ اَنۡ اَسۡـئَلَكَ مَا لَـيۡسَ لِىۡ بِهٖ عِلۡمٌ‌ ؕ وَاِلَّا تَغۡفِرۡ لِىۡ وَتَرۡحَمۡنِىۡۤ اَكُنۡ مِّنَ الۡخٰسِرِيۡنَ ﴿۴۸﴾

48. 'මාගේ අධිපතියාණෙනි, මට දැනුමක් නොමැති දේ පිළිබඳව මා ඔබගෙන් ඉල්ලීමෙන් මාව ආරක්ෂා කරන ලෙස මම ඔබගෙන් අයැදිමි. තවද ඔබ මට ක්ෂමා කර මා කෙරෙහි දයාව නොදැක්වූයේ නම් මා පරාජිතයින් අතර වන්නෙමි.'යි ඔහු කිවේය.

قِيۡلَ يٰـنُوۡحُ اهۡبِطۡ بِسَلٰمٍ مِّنَّا وَبَرَكٰتٍ عَلَيۡكَ وَعَلٰٓى اُمَمٍ مِّمَّنۡ مَّعَكَ‌ ؕ وَاُمَمٌ سَنُمَتِّعُهُمۡ ثُمَّ يَمَسُّهُمۡ مِّنَّا عَذَابٌ اَلِيۡمٌ ﴿۴۹﴾

49. 'එම්බල නූහ්, ඔබ කෙරෙහි සහ ඔබ සමග (ගමන් ගන්නා වූ) ජනතාව කෙරෙහි අප වෙතින් වූ සාමය සහ ආශිර්වාදයන් සහිතව බැස යන්න. තවද එහි (වෙනත්) ජනතාවන්ද වන්නෝය. ඔවුන්ට (කලකට) ජීවනෝපාය අපි පිරිනමන්නෙමු. පසුව අප වෙතින් වේදනීය දඬුවමක් ඔවුන්ව හසුකරන්නේයැ.'යි (එවිට) පවසන ලදි.

تِلۡكَ مِنۡ اَنۡۢبَآءِ الۡغَيۡبِ نُوۡحِيۡهَاۤ اِلَيۡكَ‌ ۚ مَا كُنۡتَ تَعۡلَمُهَاۤ اَنۡتَ وَلَا قَوۡمُكَ مِنۡ قَبۡلِ هٰذَا ؔ‌ۛ ؕ فَاصۡبِرۡ‌ ؕ‌ۛ اِنَّ الۡعَاقِبَةَ لِلۡمُتَّقِيۡنَ ﴿۵۰﴾ ع

معانقة ٩ عند المتأخرين

50. මෙය අප ඔබට අනාවරණය කර ඇති අදෘෂ්‍යමානයෙහි ආරංචිවලින් වේ. ඔබ මේවා දැන සිටියේ නැත. මීට කලින් ඔබගේ ජනතාවද (දැන සිටියේ) නැත. එබැවින් ඔබ ඉවසිලිමත්වන්න. අවසානය දෙවියන්ට බිය බැතිමත් වූවන් හටමය.

51. තවද ආද් වෙත ඔවුන්ගේ සොහොයුර හූද්ව (අපි යැව්වෙමු). 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ව (පමණක්) නමදිනු. ඔහු හැර වෙනත් දෙවියෙකු නුඹලාට නොමැත. නුඹලා බොරු ගොතන්නෝම වෙති.' යි ඔහු කීවේය.

وَاِلٰى عَادٍ اَخَاهُمْ هُوْدًا ۗ قَالَ يٰقَوْمِ اعْبُدُوا اللّٰهَ مَا لَكُمْ مِّنْ اِلٰهٍ غَيْرُهٗ ۗ اِنْ اَنْتُمْ اِلَّا مُفْتَرُوْنَ ۝٥١

52. 'එම්බල මාගේ ජනතාවනි! මම නුඹලාගෙන් ඒ සඳහා කිසිඳු තිළිණයක් නොඉල්ලමි. මාගේ තිළිණය මාව මැවූ ඔහුගෙන් හැරෙන්නට අන් කිසිවෙකුගෙන් නොලැබෙන්නේය. එහෙයින් නුඹලා වටහා නොගන්නෙහුද?'

يٰقَوْمِ لَاۤ اَسْـَٔلُكُمْ عَلَيْهِ اَجْرًا ۗ اِنْ اَجْرِيَ اِلَّا عَلَى الَّذِيْ فَطَرَنِيْ ۗ اَفَلَا تَعْقِلُوْنَ ۝٥٢

53. 'තවද එම්බල මාගේ ජනතාවනි! නුඹලාගේ අධිපතියාණන් වෙතින් සමාව අයැදිනු. පසුව ඔහු වෙත හැරෙනු. ඔහු නුඹලා මත අධිකව වැසි වස්සන්නාවූ වලාකුළු යවන්නේය. තවද නුඹලාගේ ශක්තිය තවත් ශක්තිමත් කරන්නේය. තවද පව්කාරයින් ලෙස හැරීනොයනු.'

وَيٰقَوْمِ اسْتَغْفِرُوْا رَبَّكُمْ ثُمَّ تُوْبُوْۤا اِلَيْهِ يُرْسِلِ السَّمَآءَ عَلَيْكُمْ مِّدْرَارًا وَّ يَزِدْكُمْ قُوَّةً اِلٰى قُوَّتِكُمْ وَلَا تَتَوَلَّوْا مُجْرِمِيْنَ ۝٥٣

54. ඔවුහු 'එම්බල හූද්! ඔබ අප වෙත කිසිඳු පැහැදිලි සාධකයක් ගෙනැවිත් නොමැත. තවද ඔබගේ කීමෙන් (පමණක්) අපි අපගේ දෙවිවරුන්ව අත් නොහරින්නන් වෙමු. තවද අපි ඔබ කෙරෙහි විශ්වාසිතයින් නොවෙමු.'යි කීහ.

قَالُوْا يٰهُوْدُ مَا جِئْتَنَا بِبَيِّنَةٍ وَّمَا نَحْنُ بِتَارِكِيْۤ اٰلِهَتِنَا عَنْ قَوْلِكَ وَمَا نَحْنُ لَكَ بِمُؤْمِنِيْنَ ۝٥٤

55. 'අපගේ සමහර දෙවිවරුන් ඔබට නපුරක් ගෙනදී ඇති බව පමණක් අපට කිව හැක.' (එයට) ඔහු 'නියතවශයෙන්ම මම සාක්ෂියට අල්ලාහ්ව කැඳවමි. තවද නුඹලා (අල්ලාහ්ට) සමානයන් තබන දෙයින් මා නිදහස් බව නුඹලාද සාක්ෂි දරනු'යි පිළිතුරු දුන්නේය.

اِنْ نَّقُوْلُ اِلَّا اعْتَرٰىكَ بَعْضُ اٰلِهَتِنَا بِسُوْٓءٍ ۗ قَالَ اِنِّيْۤ اُشْهِدُ اللّٰهَ وَاشْهَدُوْۤا اَنِّيْ بَرِيْٓءٌ مِّمَّا تُشْرِكُوْنَ ۝٥٥

56. 'ඔහු හැර (නුඹලා සමානයන් තබන දෙයින් මා නිදහස්)ය. එබැවින් (නුඹලාගෙන්) සියල්ලන්ම මට

مِنْ دُوْنِهٖ فَكِيْدُوْنِيْ جَمِيْعًا ثُمَّ

එරෙහිව උපායන් යොදනු. තවද මට කල් නොදෙනු.'

لَا تُنظِرُونِ ٥٦

57. 'මාගේ අධිපතියාණන් මෙන්ම නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ් කෙරෙහි මම ඇත්තෙන්ම මාගේ විශ්වාසය තබා ඇත්තෙමි. නළලෙහි වූ කෙස් රොදින් ඔහු ග්‍රහණය නොකරන (පොළොව මත) සැරිසරන කිසිම ප්‍රාණියෙකු නොමැත. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන් සෘජු මාර්ගයෙහිය'.

إِنِّي تَوَكَّلْتُ عَلَى اللَّهِ رَبِّي وَرَبِّكُمْ ۚ مَا مِنْ دَابَّةٍ إِلَّا هُوَ آخِذٌ بِنَاصِيَتِهَا ۚ إِنَّ رَبِّي عَلَىٰ صِرَاطٍ مُسْتَقِيمٍ ٥٧

58. 'පසුව නුඹලා පිටුපාන්නේ නම් මා නුඹලා වෙත එවන ලද්දේ කුමක් සමඟින් දැයි මම දැනටමත් නුඹලාට දැනුම් දී ඇත්තෙමි. තවද (නුඹලා පිටුපාන්නේ නම්) මාගේ අධිපතියාණන් නුඹලා වෙනුවට වෙනත් ජනතාවක් නියෝජනය කරනු ඇත. තවද ඔහුට හානියක් කරන්නට නුඹලාට නොහැකිය. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන් සියලු දේ කෙරෙහි ආරක්ෂකයාය.'

فَإِنْ تَوَلَّوْا فَقَدْ أَبْلَغْتُكُمْ مَا أُرْسِلْتُ بِهِ إِلَيْكُمْ ۚ وَيَسْتَخْلِفُ رَبِّي قَوْمًا غَيْرَكُمْ وَلَا تَضُرُّونَهُ شَيْئًا ۚ إِنَّ رَبِّي عَلَىٰ كُلِّ شَيْءٍ حَفِيظٌ ٥٨

59. තවද අපගේ අණ පැමිණි කල්හි, අපගේ (විශේෂ) දයාවෙන් අපි හූද්ව සහ ඔහු සමග විශ්වාස කළ අයවද බේරා ගත්තෙමු. තවද අපි ඔවුන්ව දැඩි දඬුවමින් බේරා ගත්තෙමු.

وَلَمَّا جَاءَ أَمْرُنَا نَجَّيْنَا هُودًا وَالَّذِينَ آمَنُوا مَعَهُ بِرَحْمَةٍ مِنَّا وَنَجَّيْنَاهُمْ مِنْ عَذَابٍ غَلِيظٍ ٥٩

60. තවද මොවුහු ආද් වෙති. මොවුහු සිය අධිපතියාණන්ගේ සලකුණු ප්‍රතික්ෂේප කළහ. තවද ඔහුගේ දූතයින්ට අකීකරු වූහ. තවද (සත්‍යයේ) සෑම අහංකාර සතුරකුගේ අණ ඔවුහු අනුගමනය කළහ.

وَتِلْكَ عَادٌ ۖ جَحَدُوا بِآيَاتِ رَبِّهِمْ وَعَصَوْا رُسُلَهُ وَاتَّبَعُوا أَمْرَ كُلِّ جَبَّارٍ عَنِيدٍ ٦٠

61. තවද මෙලොවෙහිදී ද පුනරුත්ථාන දිනයේදී ද ශාපය ඔවුන්ව ලුහු බැඳීමට සලස්වන ලදි. අවධාරණයයි! ආද් (ගෝත්‍රයින්) ඔවුන්ගේ අධිපතියාණන්ට අකෘතඥව හැසිරුණහ. අවධාරණයයි! හූද්ගේ ජනතාව වන ආද් විනාශයට පත්වේවා!

وَأُتْبِعُوا فِي هَٰذِهِ الدُّنْيَا لَعْنَةً وَيَوْمَ الْقِيَامَةِ ۗ أَلَا إِنَّ عَادًا كَفَرُوا رَبَّهُمْ ۗ أَلَا بُعْدًا لِعَادٍ قَوْمِ هُودٍ ٦١

وَإِلَىٰ ثَمُودَ أَخَاهُمْ صَالِحًا ۚ قَالَ يَا قَوْمِ اعْبُدُوا اللَّهَ مَا لَكُم مِّنْ إِلَٰهٍ غَيْرُهُ ۖ هُوَ أَنشَأَكُم مِّنَ الْأَرْضِ وَاسْتَعْمَرَكُمْ فِيهَا فَاسْتَغْفِرُوهُ ثُمَّ تُوبُوا إِلَيْهِ ۚ إِنَّ رَبِّي قَرِيبٌ مُّجِيبٌ ﴿٦٢﴾

62. තවද සමූද්(ගේ ගෝත්‍රය) වෙත ඔවුන්ගේ සොහොයුරු සාලිහ්ව (අපි යැවීමු). ඔහු 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ට නමදිනු. ඔහු හැර නැමදිමට සුදුස්සෙකු නුඹලාට නැත. ඔහු නුඹලාව පොළොවෙන් ඇති කළේය. තවද එහිම නුඹලාව පදිංචි කළේය. එබැවින් ඔහුගෙන් ක්ෂමාව අයැද සිටිනු. පසුව (මුළු හදවතින්ම) ඔහු වෙත හැරෙනු. සැබැවින්ම, මාගේ අධිපතියාණන් ඉතා සමීපය. (තවද යාච්ඤාවන්ට) පිළිතුරු දෙන්නායැ.'යි කීවේය.

قَالُوا يَا صَالِحُ قَدْ كُنتَ فِينَا مَرْجُوًّا قَبْلَ هَٰذَا ۖ أَتَنْهَانَا أَن نَّعْبُدَ مَا يَعْبُدُ آبَاؤُنَا وَإِنَّنَا لَفِي شَكٍّ مِّمَّا تَدْعُونَا إِلَيْهِ مُرِيبٍ ﴿٦٣﴾

63. 'එම්බල සාලිහ්! ඔබ මීටපෙර අප අතර අපගේ විශ්වාසය තැබූ අයෙක් වූවෙහිය. අපගේ පියවරුන් නැමදුම් කළ දේ නැමදුම් කරන්නට ඔබ අපට තහනම් කරන්නෙහිද? තවද ඔබ අපව කුමන දේ වෙත කැඳවන්නේද එය පිළිබඳව නියතවශයෙන්ම අපි නොසැනසිල්ලක් ඇතිකරන්නාවූ සැකයෙහි වෙමු'යි ඔවුහු කීහ.

قَالَ يَا قَوْمِ أَرَأَيْتُمْ إِن كُنتُ عَلَىٰ بَيِّنَةٍ مِّن رَّبِّي وَآتَانِي مِنْهُ رَحْمَةً فَمَن يَنصُرُنِي مِنَ اللَّهِ إِنْ عَصَيْتُهُ ۖ فَمَا تَزِيدُونَنِي غَيْرَ تَخْسِيرٍ ﴿٦٤﴾

64. 'එම්බල මාගේ ජනතාවනි! මා හට පවසනු, මාගේ අධිපතියාණන් වෙතින් මා පැහැදිලි සාධකයක් මත සිටිමින් එමෙන්ම ඔහු වෙතින්ම ඔහු මාහට දයාව ලබාදී ඇත්තේ නම්, මා ඔහුට අවනත නොවුවහොත් අල්ලාහ්ගෙන් (බේරීමට) මට සරණ වන්නේ කවරෙක්ද? එබැවින් නුඹලා එකතුකරන්නේ මාගේ විනාශය මිස නැතැ'යි ඔහු කීවේය.

وَيَا قَوْمِ هَٰذِهِ نَاقَةُ اللَّهِ لَكُمْ آيَةً فَذَرُوهَا تَأْكُلْ فِي أَرْضِ اللَّهِ وَلَا تَمَسُّوهَا بِسُوءٍ فَيَأْخُذَكُمْ عَذَابٌ قَرِيبٌ ﴿٦٥﴾

65. 'තවද එම්බල මාගේ ජනතාවනි! නුඹලාට සළකුණක් ලෙස අල්ලාහ්ගේ ඔටුදෙන මෙය වේ. එබැවින් අල්ලාහ්ගේ පොළොවෙහි එය (නිදහසේ) උලා කන්නට එයට තනිව ඉඩ හරිනු. තවද එයට හිංසා නොපමුණුවනු. එසේ නොවුවහොත් ඉක්මන් දඬුවමක් නුඹලාව හසුකරනු ඇත'.

66. එහෙත් ඔවුහු එයගේ කලවේ නහරය කැපූහ. පසුව ඔහු 'නුඹලා නුඹලාගේ නිවෙස් තුළ තෙදිනකට ප්‍රීතියෙන් භුක්ති විඳිනු. මෙය පොරොන්දුවකි. එය බොරුකළ නොහැක්කක් වන්නේයැ.'යි කීවේය.

فَعَقَرُوْهَا فَقَالَ تَمَتَّعُوْا فِيْ دَارِكُمْ ثَلٰثَةَ اَيَّامٍ ؕ ذٰلِكَ وَعْدٌ غَيْرُ مَكْذُوْبٍ ﴿٦٦﴾

67. එබැවින් අපගේ අණ පැමිණි කල්හි, අපි සාලිහ්ව ද ඔහු සමග විශ්වාස කළ අයවද අපගේ (විශේෂිතවූ) දයාවෙන් බේරා ගත්තෙමු. තවද එදින නින්දාවෙන් (අපි ඔවුන්ව බේරා ගත්තෙමු). නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් ශක්තිවන්තය, බල සම්පන්නය.

فَلَمَّا جَآءَ اَمْرُنَا نَجَّيْنَا صٰلِحًا وَّالَّذِيْنَ اٰمَنُوْا مَعَهٗ بِرَحْمَةٍ مِّنَّا وَمِنْ خِزْيِ يَوْمِئِذٍ ؕ اِنَّ رَبَّكَ هُوَ الْقَوِيُّ الْعَزِيْزُ ﴿٦٧﴾

68. තවද ගිගුරුම් සහිත හඬක් වැරදි කළ අයව හසුකළේය. එමෙන්ම හිමිදිරිය වන විට ඔවුහු ඔවුන්ගේ නිවෙස් තුළ මුණින් වැටී සිටියහ.

وَاَخَذَ الَّذِيْنَ ظَلَمُوا الصَّيْحَةُ فَاَصْبَحُوْا فِيْ دِيَارِهِمْ جٰثِمِيْنَ ۙ ﴿٦٨﴾

69. ඔවුහු එහි කිසිදා වාසය නොකළවුන් මෙන් පත්වූහ. අවධාරණයයි! සමූද් (ගෝත්‍රය) තම අධිපතියාණන් වෙත අකෘතඥව හැසිරුණෝය. අවධාරණයයි! සමූද්(ගේ ගෝත්‍රය)ට විනාශයයි.

كَاَنْ لَّمْ يَغْنَوْا فِيْهَا ؕ اَلَاۤ اِنَّ ثَمُوْدَاۡ كَفَرُوْا رَبَّهُمْ ؕ اَلَا بُعْدًا لِّثَمُوْدَ ﴿٦٩﴾

70. තවද නියතවශයෙන්ම අපගේ සුරදූතයින් ශුභාරංචි සමගින් ඉබ්රාහිම් වෙත පැමිණියහ. '(අපි ඔබට) සාමය (පතමු)'යි ඔවුහු කීහ. '(ඔබටද) සාමය (අත්වේවා)'යි ඔහු පිළිතුරු දුන්නේය. තවද පුළුස්සපු වසු පැටවෙකුව නොපමාව ගෙන ආවේය.

وَلَقَدْ جَآءَتْ رُسُلُنَاۤ اِبْرٰهِيْمَ بِالْبُشْرٰى قَالُوْا سَلٰمًا ؕ قَالَ سَلٰمٌ فَمَا لَبِثَ اَنْ جَآءَ بِعِجْلٍ حَنِيْذٍ ﴿٧٠﴾

71. එහෙත් ඔවුන්ගේ අත් එය වෙත ළඟා නොවූ බව ඔහු දුටු කල්හි, ඔවුන්ව (නුහුරු) ආගන්තුකයන් සේ ඔහු තේරුම් ගත්තේය. තවද ඔවුන් පිළිබඳව බියක්ද හටගත්තේය. ඔවුහු 'බිය නොවන්න, ලූත්ගේ ජනතාව වෙත අපි එවන ලද්දෙමු'යි කීහ.

فَلَمَّا رَاٰۤ اَيْدِيَهُمْ لَا تَصِلُ اِلَيْهِ نَكِرَهُمْ وَاَوْجَسَ مِنْهُمْ خِيْفَةً ؕ قَالُوْا لَا تَخَفْ اِنَّاۤ اُرْسِلْنَاۤ اِلٰى قَوْمِ لُوْطٍ ؕ ﴿٧١﴾

72. තවද ඔහුගේ බිරිය (ඒ අසල) සිටියාය. පසුව ඇය සිනාසුණාය. එවිට අපි ඉස්හාක්ගේ උපත පිළිබඳවද, එමෙන්ම ඉස්හාක්ගෙන් පසුව යඃකූබ් පිළිබඳවද ශුභාරංචි ඇයට දුනිමු.

وَامۡرَاَتُهٗ قَآئِمَةٌ فَضَحِكَتۡ فَبَشَّرۡنٰهَا بِاِسۡحٰقَ ۙ وَمِنۡ وَّرَآءِ اِسۡحٰقَ يَعۡقُوۡبَ ﴿٧٢﴾

73. 'අහෝ! මාගේ දුකකි! මා මහළු ස්ත්‍රියක් වෙමින් එමෙන්ම මේ මාගේ සැමියාද මහළු මිනිසෙකු වන විට මා කෙසේ නම් දරුවකු ලබන්නෙම්ද? ඇත්තෙන්ම මෙය නම් පුදුමාකාර දෙයකි.' යි ඇය කිවාය.

قَالَتۡ يٰوَيۡلَتٰٓى ءَاَلِدُ وَاَنَا عَجُوۡزٌ وَّهٰذَا بَعۡلِىۡ شَيۡخًا ؕ اِنَّ هٰذَا لَشَىۡءٌ عَجِيۡبٌ ﴿٧٣﴾

74. 'අල්ලාහ්ගේ නියමය ගැන ඔබ පුදුමවන්නෙහිද? එම්බල නිවසේ ජනතාවනි! අල්ලාහ්ගේ දයාව සහ ඔහුගේ ආශිර්වාදය ඔබලා කෙරෙහිය. නියතවශයෙන්ම ඔහු ප්‍රශංසාහිමිය, මහානුභාවසම්පන්න යැ'යි ඔවුහු කීහ.

قَالُوۡۤا اَتَعۡجَبِيۡنَ مِنۡ اَمۡرِ اللّٰهِ رَحۡمَتُ اللّٰهِ وَبَرَكٰتُهٗ عَلَيۡكُمۡ اَهۡلَ الۡبَيۡتِ ؕ اِنَّهٗ حَمِيۡدٌ مَّجِيۡدٌ ﴿٧٤﴾

75. තවද ඉබ්රාහිම්ගෙන් බිය පහව ගොස් ශුභාරංචි ඔහු වෙත පැමිණි කල්හි ඔහු ලූත්ගේ ජනතාව පිළිබඳව අප හා වාදකරන්නට පටන් ගත්තේය.

فَلَمَّا ذَهَبَ عَنۡ اِبۡرٰهِيۡمَ الرَّوۡعُ وَجَآءَتۡهُ الۡبُشۡرٰى يُجَادِلُنَا فِىۡ قَوۡمِ لُوۡطٍ ﴿٧٥﴾

76. ඇත්තෙන්ම ඉබ්රාහිම් ඉතා ඉවසිලිවන්ත මෙන්ම සියුම් හදවතක් ඇත්තෙකු විය. එමෙන්ම (දෙවියන් වෙත) නිතර හැරෙන්නෙකුද විය.

اِنَّ اِبۡرٰهِيۡمَ لَحَلِيۡمٌ اَوَّاهٌ مُّنِيۡبٌ ﴿٧٦﴾

77. 'එම්බල ඉබ්රාහිම්! මෙයින් වැළකි සිටින්න. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ගේ විධානය පැමිණ ඇත. තවද නියතවශයෙන්ම වැළැක්විය නොහැකි දඬුවමක් ඔවුනට පැමිණෙනු ඇත'.

يٰۤاِبۡرٰهِيۡمُ اَعۡرِضۡ عَنۡ هٰذَا ۚ اِنَّهٗ قَدۡ جَآءَ اَمۡرُ رَبِّكَ ۚ وَاِنَّهُمۡ اٰتِيۡهِمۡ عَذَابٌ غَيۡرُ مَرۡدُوۡدٍ ﴿٧٧﴾

78. තවද අපගේ සුරදූතයින් ලූත් වෙත පැමිණිවිට, ඔහු ඔවුන් ගැන කණස්සල්ලට පත්වී ඔවුන් වෙනුවෙන් සිත්තැවුල් වී තවද 'මෙය දුක්බිත දිනයක් වේයැ' යි ඔහු කිවේය.

وَلَمَّا جَآءَتۡ رُسُلُنَا لُوۡطًا سِىۡٓءَ بِهِمۡ وَضَاقَ بِهِمۡ ذَرۡعًا وَّقَالَ هٰذَا يَوۡمٌ عَصِيۡبٌ ﴿٧٨﴾

*79. තවද ඔහුගේ ජනයා (කෝපයෙන්) වෙවුලමින් ඔහු වෙත දිව ආහ. මීට කලින්ද ඔවුහු නපුරෙහි නියැලී සිටියහ. 'එම්බල මාගේ ජනතාවනි! මොවුහු මාගේ දියණියන්ය. ඔවුහු නුඹලාට අතිශයින්ම පතිවත රකින්නන් වෙති. එබැවින් අල්ලාහ්ට බියවනු. තවද මාගේ ආගන්තුකයින් සම්බන්ධයෙන් මා අවමානයට පත් නොකරනු. නුඹලා අතර සිහි බුද්ධියෙන් යුත් මිනිසෙකුවත් නැද්දැ?' යි ඔහු කීවේය.

وَجَآءَهٗ قَوْمُهٗ يُهْرَعُوْنَ اِلَيْهِ ۗ وَمِنْ قَبْلُ كَانُوْا يَعْمَلُوْنَ السَّيِّاٰتِ ۗ قَالَ يٰقَوْمِ هٰٓؤُلَآءِ بَنَاتِىْ هُنَّ اَطْهَرُ لَـكُمْ فَاتَّقُوا اللّٰهَ وَلَا تُخْزُوْنِ فِىْ ضَيْفِىْ ۗ اَلَيْسَ مِنْكُمْ رَجُلٌ رَّشِيْدٌ ﴿٧٩﴾

80. 'ඔබගේ දියණියන් සම්බන්ධයෙන් අපට කිසිදු හිමිකමක් නොමැති බව ඔබ නියතවශයෙන්ම දන්නෙහිය. තවද අප කැමති දේ ඔබ නියතවශයෙන්ම දන්නෙහියැ'යි ඔවුහු පිළිතුරු දුන්හ.

قَالُوْا لَقَدْ عَلِمْتَ مَا لَنَا فِىْ بَنٰتِكَ مِنْ حَقٍّ ۚ وَاِنَّكَ لَتَعْلَمُ مَا نُرِيْدُ ﴿٨٠﴾

81. 'නුඹලා සමඟ (කටයුතු කිරීමට) මට බලය ඇත්නම් නැතහොත් (ආරක්ෂාව පිණිස) මා බලවත් ආධාරකයක් ගත යුතු යැ'යි ඔහු කීවේය.

قَالَ لَوْ اَنَّ لِىْ بِكُمْ قُوَّةً اَوْ اٰوِىْۤ اِلٰى رُكْنٍ شَدِيْدٍ ﴿٨١﴾

82. 'එම්බල ලූත්! අපි ඔබගේ අධිපතියාණන්ගේ (සුර)දූතයින් වන්නෙමු. ඔවුන් කිසිම විදියකින්වත් ඔබ වෙතට ළං නොවන්නෝය. එබැවින් ඔබගේ පවුලේ අය සමඟ රාත්‍රියේ කිසියම් හෝරාවකදී පිටත්වන්න. තවද ඔබගේ බිරිඳ හැරෙන්නට ඔබලාගෙන් කිසිවෙක් ආපසු හැරී නොබැලිය යුතුය.

قَالُوْا يٰلُوْطُ اِنَّا رُسُلُ رَبِّكَ لَنْ يَّصِلُوْۤا اِلَيْكَ فَاَسْرِ بِاَهْلِكَ بِقِطْعٍ مِّنَ الَّيْلِ وَلَا يَلْتَفِتْ مِنْكُمْ اَحَدٌ اِلَّا امْرَاَتَكَ ۗ اِنَّهٗ مُصِيْبُهَا مَاۤ اَصَابَهُمْ ۗ اِنَّ

*සටහන. 79: විරුද්ධ ලිංගිකයන්ගේ ආකර්ෂණයට කැමැත්තක් නොදක්වන ජනතාවට මෙය ඉතා යෝග්‍ය නිරායුධ ප්‍රති ප්‍රහාරයකි. සැබැවින්ම ස්ත්‍රීන් ඔවුන් වෙනුවෙන් පතිවත්දම් රකින්නන් වූහ. මෙය වෙනුවෙන් 'අතිශයින්ම පතිවත රකින්නන්' යන කියමන සඳහන් වේ. කෙසේ නමුත් ලූත් තමාගේම දියණියන්ව ඔවුනට දී ඇත්තේ නම් එවිට ඔහුගේ ආගන්තුකයින්ගේ ගෞරවය ඔවුන් මගින්ම ආරක්ෂා කරදෙන්නට තිබුණි යන නපුරන් දුන් මෙම පිළිතුර දුරාචාර ගෙතීමක් මෙන්ම ප්‍රෝඩාවකි. එනම් ඔහු ඔවුන්ගේ අසරණභාවය අනිසි ලෙස යොදාගැනීමට කැඳවීමක් මෙන්ය. පැහැදිලිවම මෙම පිළිතුර ඔවුන්ගේ දුරාචාර පැවැත්ම පිළිබිඹු කරන්නක් විය.

*නියතවශයෙන්ම ඔවුන්ට අත් වන්නාවූ දෙය ඇයටද අත්වනු ඇත. සැබැවින්ම ඔවුන්ගේ නියමිත කාලය අලුයමය. අලුයම ආසන්න නොවේදැ?'යි (සුරදූතයෝ) කීහ.

مَوْعِدَهُمُ الصُّبْحُ ۚ أَلَيْسَ الصُّبْحُ بِقَرِيبٍ ﴿٨٢﴾

83. පසුව අපගේ අණ පැමිණි කල්හි අපි එය (නගරය) උඩු යටිකුරු කළෙමු. තවද අපි එය මත මැටි ගල් එක පිට එක වශයෙන් වසින්නට සැලැස්වීමු.

فَلَمَّا جَاءَ أَمْرُنَا جَعَلْنَا عَالِيَهَا سَافِلَهَا وَأَمْطَرْنَا عَلَيْهَا حِجَارَةً مِّن سِجِّيلٍ مَّنضُودٍ ﴿٨٣﴾

84. ඔබ අධිපතියාණන්ගේ අභියස (ඔවුන් සඳහා) ලකුණු කරන ලදි. තවද (වත්මන් යුගයේ) එය (දඬුවම) වරදකරුවන්ගෙන් දුරස්ථ නොවේ.

مُّسَوَّمَةً عِندَ رَبِّكَ ۖ وَمَا هِيَ مِنَ الظَّالِمِينَ بِبَعِيدٍ ﴿٨٤﴾

85. තවද මද්යන් (ජනයා) වෙත ඔවුන්ගේ සොහොයුර ෂුඅයිබ්ව (අපි යැව්වෙමු). ඔහු 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ට නමදිනු. ඔහු හැර නැමදීමට සුදුස්සෙකු නුඹලාට නොමැත. තවද අඩුවෙන් මැන හෝ අඩුවෙන් කිරා නොදෙනු. මා නුඹලාව සෞභාග්‍යමත්ව දකිමි. තවද නුඹලා කෙරෙහි විනාශවන දිනයේ දඬුවම ගැන මම බිය වෙමි'යි කීවේය.

وَإِلَىٰ مَدْيَنَ أَخَاهُمْ شُعَيْبًا ۚ قَالَ يَا قَوْمِ اعْبُدُوا اللَّهَ مَا لَكُم مِّنْ إِلَٰهٍ غَيْرُهُ ۖ وَلَا تَنقُصُوا الْمِكْيَالَ وَالْمِيزَانَ ۚ إِنِّي أَرَاكُم بِخَيْرٍ وَإِنِّي أَخَافُ عَلَيْكُمْ عَذَابَ يَوْمٍ مُّحِيطٍ ﴿٨٥﴾

86. තවද 'එම්බල මාගේ ජනතාවනි! කිරුම හා මිනුම යුක්ති සහගතව සම්පූර්ණ කරනු. තවද මිනිසුන්ට ඔවුන්ගේ (අයිති) දේවල් අඩුකර නොදෙනු. තවද කලබල ඇති කරමින් පොළොවෙහි අයුක්තිගරුක නොවනු'.

وَيَا قَوْمِ أَوْفُوا الْمِكْيَالَ وَالْمِيزَانَ بِالْقِسْطِ ۖ وَلَا تَبْخَسُوا النَّاسَ أَشْيَاءَهُمْ وَلَا تَعْثَوْا فِي الْأَرْضِ مُفْسِدِينَ ﴿٨٦﴾

*සටහන. 82: ආගන්තුක වශයෙන් පැමිණි සුරදූතයින්ගේ මෙම අවවාදය පෙන්නුම් කරන්නේ ලූත් සහ ඔහුගේ ජනතාව අතර රහසිගතව සිදුවූ සංවාදය බවත් මෙතෙක් ඔහු වෙතට හෝ නිවසෙහි අන්කිසිවෙකු වෙතට හෝ සෘජුව ප්‍රවේශ වීමට අවස්ථාවක් ඔවුනට නොතිබූ බවත්ය. ඔවුන්ගේ උත්සාහයෙහි අසමත් බව හේතුකොට ගෙන ඔවුන් ලූත්ව ආපසු බැහැ දැකීමට නිවස තුළ බලහත්කාරයෙන් ඇතුල් වීම සඳහා වඩා සූදානමින් යුතුව ඔවුන් අදිටන් කළහ. රාත්‍රියේ අවසන් භාගයේ ඔහුගේ බිරිඳ හැර ඔහුගේ පවුලේ සියලු සාමාජිකයින් සමග නිවසින් පිටත් වී යාමට සුර දූතයින්ගේ අවවාදය මගින් පසුව මෙය ප්‍රතික්ෂේප විය.

بَقِيَّتُ اللّٰهِ خَيۡرٌ لَّكُمۡ اِنۡ كُنۡتُمۡ مُّؤۡمِنِيۡنَ ۚ وَمَاۤ اَنَا عَلَيۡكُمۡ بِحَفِيۡظٍ ﴿٨٧﴾

87. 'නුඹලා විශ්වාසිතයින් නම් (නුඹලා වෙත) අල්ලාහ් වෙතින් ඉතිරි කළ දේම නුඹලාට වඩාත් යහපත් වේ. තවද මම නුඹලාට සුපරීක්ෂකයෙකු නොවෙමි'.

قَالُوۡا يٰشُعَيۡبُ اَصَلٰوتُكَ تَاۡمُرُكَ اَنۡ نَّتۡرُكَ مَا يَعۡبُدُ اٰبَآؤُنَاۤ اَوۡ اَنۡ نَّفۡعَلَ فِىۡۤ اَمۡوَالِنَا مَا نَشٰٓؤُا ؕ اِنَّكَ لَاَنۡتَ الۡحَلِيۡمُ الرَّشِيۡدُ ﴿٨٨﴾

88. ඔවුහු 'එම්බල ෂුඅයිබ්! අපගේ පියවරුන් නැමදුම් කළ දේ ද අපගේ දේපල වලින් අප කැමති දේ කිරීමද අප අත්හැරිය යුතු යැයි ඔබගේ නමස්කාරය ඔබට අණ කරන්නේද? (ඇත්තෙන්ම) ඔබ ඉතා බුද්ධිමත් (හා) අවංක සිත් ඇත්තෙකුයැ'යි පිළිතුරු දුන්හ.

قَالَ يٰقَوۡمِ اَرَءَيۡتُمۡ اِنۡ كُنۡتُ عَلٰى بَيِّنَةٍ مِّنۡ رَّبِّىۡ وَرَزَقَنِىۡ مِنۡهُ رِزۡقًا حَسَنًا ؕ وَمَاۤ اُرِيۡدُ اَنۡ اُخَالِفَكُمۡ اِلٰى مَاۤ اَنۡهٰٮكُمۡ عَنۡهُ ؕ اِنۡ اُرِيۡدُ اِلَّا الۡاِصۡلَاحَ مَا اسۡتَطَعۡتُ ؕ وَمَا تَوۡفِيۡقِىۡۤ اِلَّا بِاللّٰهِ ؕ عَلَيۡهِ تَوَكَّلۡتُ وَاِلَيۡهِ اُنِيۡبُ ﴿٨٩﴾

89. ඔහු 'එම්බල මාගේ ජනතාවනි! මා මාගේ අධිපතියාණන් වෙතින් පැහැදිලි සාක්ෂියක් මත නිරත වන්නේ නම්, එමෙන්ම ඔහු තමා වෙතින් යහපත් ජීවනෝපාය මා හට සලසා ඇත්නම් (නුඹලා ඔහුට කුමන පිළිතුරක් දෙන්නෙහුදැයි) මා හට පවසනු. තවද නුඹලා නොකළයුතු යැයි මා ඉල්ලාසිටි (එම) දෙයම නුඹලාට එරෙහිව කිරීමට මම කැමති නොවෙමි. මට හැකිතාක් ප්‍රතිසංස්කරණය කිරීම පමණක් මම කැමති වෙමි. අල්ලාහ් හැර මා වෙත කිසිඳු බලයක් නොමැත. ඔහු කෙරෙහි මම විශ්වාසය තබන අතර ඔහු වෙතම මම හැරෙමි'යි කීවේය.

وَيٰقَوۡمِ لَا يَجۡرِمَنَّكُمۡ شِقَاقِىۡۤ اَنۡ يُّصِيۡبَكُمۡ مِّثۡلُ مَاۤ اَصَابَ قَوۡمَ نُوۡحٍ اَوۡ قَوۡمَ هُوۡدٍ اَوۡ قَوۡمَ صٰلِحٍ ؕ وَمَا قَوۡمُ لُوۡطٍ مِّنۡكُمۡ بِبَعِيۡدٍ ﴿٩٠﴾

90. 'තවද එම්බල මාගේ ජනතාවනි! මාවෙත (දක්වන නුඹලාගේ) සතුරුකම, නූහ්ගේ ජනතාව මත හෝ හූද්ගේ ජනතාව මත හෝ සාලිහ්ගේ ජනතාව මත හෝ අත්වූ දෙයට සමානව නුඹලාටද අත්වීමට නොපෙළඹෙත්වා. එමෙන්ම ලූත්ගේ ජනතාව නුඹලාගෙන් දුරස්ථ නොවේ'.

وَاسۡتَغۡفِرُوۡا رَبَّكُمۡ ثُمَّ تُوۡبُوۡۤا اِلَيۡهِ ؕ اِنَّ

91. 'තවද නුඹලාගේ අධිපතියාණන්ගෙන් ක්ෂමාව අයැදිනු. පසුව (මුළු හදවතින්ම) ඔහු වෙත

رَبِّىْ رَحِيْمٌ وَّدُوْدٌ ﴿٩١﴾

හැරෙනු. සැබැවින්ම මාගේ අධිපතියාණන් පරම දයාබරය, අතිශයින්ම ස්නේහවන්තය'.

قَالُوْا يٰشُعَيْبُ مَا نَفْقَهُ كَثِيْرًا مِّمَّا تَقُوْلُ وَاِنَّا لَنَرٰٮكَ فِيْنَا ضَعِيْفًا ۚ وَلَوْلَا رَهْطُكَ لَرَجَمْنٰكَ ۖ وَمَاۤ اَنْتَ عَلَيْنَا بِعَزِيْزٍ ﴿٩٢﴾

92. ඔවුහු 'එම්බල ෂුඅයිබ්! ඔබ පවසන දෙයින් බොහොමයක් අපට තේරුම්ගත නොහැක. නියත වශයෙන්ම අපි ඔබව අප අතර සිටින දුබලයෙකු ලෙස දකිමු. තවද ඔබගේ ගෝත්‍රය නොසිටියේ නම්, නියතවශයෙන්ම අපි ඔබට ගල් ගසා (මරා) දමන්නෙමු. ඔබව ගත්කල අප කෙරෙහි ඔබට කිසිම බලයක් නැතැ'යි පිළිතුරු දුන්හ.

قَالَ يٰقَوْمِ اَرَهْطِىْۤ اَعَزُّ عَلَيْكُمْ مِّنَ اللّٰهِ ؕ وَاتَّخَذْتُمُوْهُ وَرَآءَكُمْ ظِهْرِيًّا ؕ اِنَّ رَبِّىْ بِمَا تَعْمَلُوْنَ مُحِيْطٌ ﴿٩٣﴾

93. ඔහු 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ට වඩා නුඹලාට මාගේ ගෝත්‍රය බලවත් වේද? තවද නුඹලා ඔහුව නුඹලාගේ පිටුපසට නොසලකාහරින ලද්දක් මෙන් ඉවත දැමුවෙහුය. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන් නුඹලා කරන සියල්ලක්ම වටලන්නේයැ'යි කීවේය.

وَيٰقَوْمِ اعْمَلُوْا عَلٰى مَكَانَتِكُمْ اِنِّىْ عَامِلٌ ؕ سَوْفَ تَعْلَمُوْنَ ۙ مَنْ يَّاْتِيْهِ عَذَابٌ يُّخْزِيْهِ وَمَنْ هُوَ كَاذِبٌ ؕ وَارْتَقِبُوْۤا اِنِّىْ مَعَكُمْ رَقِيْبٌ ﴿٩٤﴾

94. 'තවද එම්බල මාගේ ජනතාවනි! නුඹලාට හැකි පමණින් ක්‍රියා කරනු. මම(ද) ක්‍රියා කරන්නෙමි. අවමානයට ලක්කරන්නාවූ දඬුවමක් පතිත වන්නේ කා වෙතද යන්නත් මුසාවාදියා කවරෙක්ද යන්නත් නුඹලා ඉක්මනින්ම දැන ගන්නෙහුය. තවද බලා සිටිනු. නියතවශයෙන්ම මමද නුඹලා සමග බලා සිටිමි'.

وَلَمَّا جَآءَ اَمْرُنَا نَجَّيْنَا شُعَيْبًا وَّالَّذِيْنَ اٰمَنُوْا مَعَهٗ بِرَحْمَةٍ مِّنَّا وَاَخَذَتِ الَّذِيْنَ ظَلَمُوا الصَّيْحَةُ فَاَصْبَحُوْا فِىْ دِيَارِهِمْ جٰثِمِيْنَ ۙ ﴿٩٥﴾

95. තවද අපගේ අණ පැමිණි කල්හි අපි ෂුඅයිබ්ව ද ඔහු සමග විශ්වාස කළ අයවද අපගේ (විශේෂිතවූ) දයාවෙන් බේරා ගත්තෙමු. තවද වැරදි කළ අයව ගිගුරුම් (සහිත) දඬුවම හසුකළේය. එබැවින් ඔවුහු සිය නිවෙස් තුළ මුණින් වැටී සිටියහ.

كَاَنْ لَّمْ يَغْنَوْا فِيْهَا ؕ اَلَا بُعْدًا لِّمَدْيَنَ

96. ඔවුහු එහි කිසිදා වාසය

كَمَا بَعِدَتْ ثَمُوْدُ ﴿٩٦﴾

නොකළාක් මෙන් වූහ. අවධාරණයයි! සමූද් (ජනයා) විනාශ කරනු ලැබුවාක් මෙන් මද්යන් (ජනයා)ටද විනාශය අත්විය.

وَلَقَدْ اَرْسَلْنَا مُوْسٰى بِاٰيٰتِنَا وَسُلْطٰنٍ مُّبِيْنٍ ﴿٩٧﴾

97. තවද ඇත්තෙන්ම අපගේ සළකුණු සහ පැහැදිලි සාක්ෂි සමග අපි මූසාව යැව්වෙමු.

اِلٰى فِرْعَوْنَ وَمَلَا۟ئِهٖ فَاتَّبَعُوْۤا اَمْرَ فِرْعَوْنَ ۚ وَمَاۤ اَمْرُ فِرْعَوْنَ بِرَشِيْدٍ ﴿٩٨﴾

98. ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් වෙත. එහෙත් ඔවුහු ෆිර්අවුන්ගේ අණ පිළිපැදූහ. තවද ෆිර්අවුන්ගේ අණ කිසිසේත්ම නිවැරදි නොවීය.

يَقْدُمُ قَوْمَهٗ يَوْمَ الْقِيٰمَةِ فَاَوْرَدَهُمُ النَّارَ ؕ وَبِئْسَ الْوِرْدُ الْمَوْرُوْدُ ﴿٩٩﴾

99. පුනරුත්ථාන දිනයෙහි ඔහු සිය ජනතාව පෙරටුව යමින් (ගවයින් දිය කඩිත්ත වෙතට ගෙන යන්නාක් මෙන්) ගිනි (වලක්) වෙතට ඔවුන්ව ගෙන යයි. තවද දිය කඩිත්ත ද එය වෙත ගෙනයනු ලබන්නාවූ අයද නපුරුය.

وَاُتْبِعُوْا فِيْ هٰذِهٖ لَعْنَةً وَّيَوْمَ الْقِيٰمَةِ ؕ بِئْسَ الرِّفْدُ الْمَرْفُوْدُ ﴿١٠٠﴾

100. මෙ(ලොවෙ)හි ද පුනරුත්ථාන දිනයෙහි ද ඔවුන් ශාපයකින් ලුහුබඳිනු ලැබ ඇත. එමෙන්ම ත්‍යාග ද, එවැනි ත්‍යාග ලබන්නාවූ අයද නපුරුය.

ذٰلِكَ مِنْ اَنْۢبَآءِ الْقُرٰى نَقُصُّهٗ عَلَيْكَ مِنْهَا قَآئِمٌ وَّحَصِيْدٌ ﴿١٠١﴾

101. මෙය (විනාශයට පත් වූ) නගරයන්ගේ ආරංචියන් ගෙන්ය. අප එය ඔබට විස්තර කරන්නෙමු. මේවායින් (සමහරක්) පවතින අතර (සමහරක්) කපා හරින ලද (ගොයම මෙන්)ය.

وَمَا ظَلَمْنٰهُمْ وَلٰكِنْ ظَلَمُوْۤا اَنْفُسَهُمْ فَمَاۤ اَغْنَتْ عَنْهُمْ اٰلِهَتُهُمُ الَّتِيْ يَدْعُوْنَ مِنْ دُوْنِ اللّٰهِ مِنْ شَيْءٍ لَّمَّا جَآءَ اَمْرُ رَبِّكَ ؕ وَمَا زَادُوْهُمْ غَيْرَ تَتْبِيْبٍ ﴿١٠٢﴾

102. තවද අපි ඔවුනට වරද නොකළෙමු. ඔවුහු තමන්ටම වරද කර ගත්හ. තවද ඔබ අධිපතියාණන්ගේ අණ පැමිණි කල්හි, ඔවුන් අල්ලාහ් හැර කැඳවූ අන් දෙවිවරුන් ඔවුනට ඵලක් නොවූහ. ඔවුහු ඔවුනට විනාශය හැර අන් දෙයක් එකතු නොකළහ.

وَكَذٰلِكَ اَخْذُ رَبِّكَ اِذَآ اَخَذَ الْقُرٰى وَهِىَ ظَالِمَةٌ ؕ اِنَّ اَخْذَهٗۤ اَلِيْمٌ شَدِيْدٌ ﴿۱۰۳﴾

103. ඔබ අධිපතියාණන්ගේ ග්‍රහණය මෙලෙසමය. එවිට ඔහු නගරයන් අත් කර ගන්නේ ඒවා වැරදි කරමින් සිටින අතරතුරය. ඇත්තෙන්ම ඔහුගේ ග්‍රහණය වේදනීය (මෙන්ම) දැඩිය.

اِنَّ فِىْ ذٰلِكَ لَاٰيَةً لِّمَنْ خَافَ عَذَابَ الْاٰخِرَةِ ؕ ذٰلِكَ يَوْمٌ مَّجْمُوْعٌ ۙ لَّهُ النَّاسُ وَذٰلِكَ يَوْمٌ مَّشْهُوْدٌ ﴿۱۰۴﴾

104. යමෙක් පරලොවේ දඬුවමට බියවන්නේද ඔහුට නියතවශයෙන්ම එහිලා සළකුණක් ඇත. එය (සියළු) මිනිස් වර්ගයාවම එක්රැස් කරනු ලබන දිනයයි. තවද එය (සියළු දෙනා විසින් ඉදිරිපත් කරන්නාවු දේ) දකිනු ලබන දිනයයි.

وَمَا نُؤَخِّرُهٗۤ اِلَّا لِاَجَلٍ مَّعْدُوْدٍ ؕ ﴿۱۰۵﴾

105. තවද ගණනය කරන ලද නියමිත කලකට විනා අපි එය ප්‍රමාද නොකරන්නෙමු.

يَوْمَ يَاْتِ لَا تَكَلَّمُ نَفْسٌ اِلَّا بِاِذْنِهٖ ۚ فَمِنْهُمْ شَقِىٌّ وَّسَعِيْدٌ ﴿۱۰۶﴾

106. එය පැමිණෙන දිනයේදී ඔහුගේ අවසරයෙන් තොරව කිසිඳු ආත්මයකට කතා කළ නොහැකිය. පසුව ඔවුන්ගෙන් (සමහරු) අභාග්‍යවන්තයෝ ද (සමහරු) භාග්‍යවන්තයෝ ද වෙති.

فَاَمَّا الَّذِيْنَ شَقُوْا فَفِى النَّارِ لَهُمْ فِيْهَا زَفِيْرٌ وَّشَهِيْقٌ ۙ ﴿۱۰۷﴾

107. අභාග්‍යවන්තයින් ගත් කළ ඔවුන් ගින්නෙහි සිටිනු ඇත. එහි ඔවුනට සුසුම්ලෑම් හා ඉකිබිඳීම්ය.

خٰلِدِيْنَ فِيْهَا مَا دَامَتِ السَّمٰوٰتُ وَالْاَرْضُ اِلَّا مَا شَآءَ رَبُّكَ ؕ اِنَّ رَبَّكَ فَعَّالٌ لِّمَا يُرِيْدُ ﴿۱۰۸﴾

108. ඔබ අධිපතියාණන් අභිමත කරන දේ හැරෙන්නට අහස් සහ පොළොව පවතින තාක් ඔවුන් එහිම වෙසෙන්නෝය. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් ඔහු කැමති දේ කරන්නේමය.

وَاَمَّا الَّذِيْنَ سُعِدُوْا فَفِى الْجَـنَّةِ خٰلِدِيْنَ فِيْهَا مَا دَامَتِ السَّمٰوٰتُ وَالْاَرْضُ اِلَّا مَا شَآءَ رَبُّكَ ؕ عَطَآءً غَيْرَ مَجْذُوْذٍ ﴿۱۰۹﴾

109. නමුත් භාග්‍යයට පාත්‍ර වූ අය ගත්කල ඔවුන් ස්වර්ගයෙහිම වන්නෝය. ඔබගේ අධිපතියාණන් අභිමත කරන දේ හැරෙන්නට අහස් සහ පොළොව පවතින තාක් ඔවුන් එහිම වෙසෙන්නෝය. එය කපා නොහරිනු ලබන තිළිණයකි.

110. එබැවින් මොවුන් (ජනතාව) නමදින දේ පිළිබඳව ඔබ සැකයෙහි නොවන්න. මොවුන් නමදින්නේ මීටපෙර මොවුන්ගේ පියවරුන් නැමදූ ආකාරයටමය. තවද නියතවශයෙන්ම අපි ඔවුන්ගේ කොටස අඩු නොකර සම්පූර්ණයෙන්ම ඔවුන්ට ලබා දෙන්නෙමු.

فَلَا تَكُ فِيْ مِرْيَةٍ مِّمَّا يَعْبُدُ هٰۤؤُلَآءِ ؕ مَا يَعْبُدُوْنَ اِلَّا كَمَا يَعْبُدُ اٰبَآؤُهُمْ مِّنْ قَبْلُ ؕ وَاِنَّا لَمُوَفُّوْهُمْ نَصِيْبَهُمْ غَيْرَ مَنْقُوْصٍ ﴿١١٠﴾

111. තවද අපි නියතවශයෙන්ම මූසාට පුස්තකය දුනිමු. එහෙත් එහි මතභේදයන් හට ගැණින. තවද ඔබගේ අධිපතියාණන් වෙතින් පෙර දුන් වචනයක් නිසා නොවූයේ නම් එම කටයුත්ත (මීට බොහෝ කලින්) ඔවුනතර තිරණය වන්නට තිබුණි. තවද (දැන්) මොවුන් (ජනතාව) මෙය පිළිබඳව නොසැනසිල්ලක් ඇතිකරන්නාවූ සැකයෙහි වෙති.

وَلَقَدْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ فَاخْتُلِفَ فِيْهِ ؕ وَلَوْلَا كَلِمَةٌ سَبَقَتْ مِنْ رَّبِّكَ لَقُضِىَ بَيْنَهُمْ ؕ وَاِنَّهُمْ لَفِىْ شَكٍّ مِّنْهُ مُرِيْبٍ ﴿١١١﴾

112. තවද නියතවශයෙන්ම (මේ) සියල්ලන්(ගේ ක්‍රියාවන්)ට මෙතෙක් (ඔවුන්ට ඵලවිපාක අත්කරදී) නැත. (එහෙත්) ඔබගේ අධිපතියාණන් නියතවශයෙන්ම ඔවුන්ගේ ක්‍රියාවලට අනුව සම්පූර්ණයෙන්ම ඵලවිපාක ලබාදෙන්නේය. ඔහු නියතවශයෙන්ම ඔවුන් කරන සියලූ දේ ගැන අතිශයින්ම විමසිලිමත්ය.

وَاِنَّ كُلًّا لَّمَّا لَيُوَفِّيَنَّهُمْ رَبُّكَ اَعْمَالَهُمْ ؕ اِنَّهٗ بِمَا يَعْمَلُوْنَ خَبِيْرٌ ﴿١١٢﴾

113. එබැවින් ඔබට අණකරනු ලැබූ පරිදි ඔබ ස්ථිරසාරව සිටින්න. තවද ඔබ සමග (දෙවියන් වෙතට) හැරුණ අය(ද). තවද නුඹලා සීමාවන් ඉක්මවා නොයනු. (එම්බල විශ්වාසීතයිනි!) නියතවශයෙන්ම නුඹලා කරන දේ ඔහු දකින්නේය.

فَاسْتَقِمْ كَمَاۤ اُمِرْتَ وَمَنْ تَابَ مَعَكَ وَلَا تَطْغَوْا ؕ اِنَّهٗ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿١١٣﴾

114. තවද වැරදි කරන්නවුන් වෙත නැඹුරු නොවනු. නැතහොත් ගින්න නුඹලාව හසුකරනු ඇත. තවද අල්ලාහ් හැරෙන්නට නුඹලාට වෙනත් මිතුරන් නොවන්නෝය. පසුව නුඹලා උදව්කරනු නොලබන්නෝය.

وَلَا تَرْكَنُوْۤا اِلَى الَّذِيْنَ ظَلَمُوْا فَتَمَسَّكُمُ النَّارُ ۙ وَمَا لَكُمْ مِّنْ دُوْنِ اللّٰهِ مِنْ اَوْلِيَآءَ ثُمَّ لَا تُنْصَرُوْنَ ﴿١١٤﴾

وَاَقِمِ الصَّلٰوةَ طَرَفَيِ النَّهَارِ وَزُلَفًا مِّنَ الَّيۡلِ‌ؕ اِنَّ الۡحَسَنٰتِ يُذۡهِبۡنَ السَّيِّاٰتِ‌ؕ ذٰلِكَ ذِكۡرٰى لِلذّٰكِرِيۡنَ‌ ۚ ﴿۱۱۵﴾

115. තවද දවසෙහි දෙකෙළවරෙහිදී ද, (දවසට ආසන්නවූ) රාත්‍රියෙහි කොටස්හිදී ද නමස්කාරයෙහි නිරතවන්න. නියතවශයෙන්ම යහකම්, නපුර පලවා හරියි. මෙය සිහි කරන්නවුන්ට අනුශාසනාවකි.

وَاصۡبِرۡ فَاِنَّ اللّٰهَ لَا يُضِيۡعُ اَجۡرَ الۡمُحۡسِنِيۡنَ ﴿۱۱۶﴾

116. තවද ඔබ ඉවසිලිමත් වන්න. නියතවශයෙන්ම අල්ලාහ් ධාර්මිෂ්ඨකයින්ගේ තිළිණය නිෂ්ඵල නොකරන්නේමය.

فَلَوۡلَا كَانَ مِنَ الۡقُرُوۡنِ مِنۡ قَبۡلِكُمۡ اُولُوۡا بَقِيَّةٍ يَّنۡهَوۡنَ عَنِ الۡفَسَادِ فِى الۡاَرۡضِ اِلَّا قَلِيۡلًا مِّمَّنۡ اَنۡجَيۡنَا مِنۡهُمۡ‌ ۚ وَاتَّبَعَ الَّذِيۡنَ ظَلَمُوۡا مَاۤ اُتۡرِفُوۡا فِيۡهِ وَكَانُوۡا مُجۡرِمِيۡنَ ﴿۱۱۷﴾

117. එසේනම් නුඹලාට පෙරවූ පරම්පරාවන් අතුරින් අප බේරාගත් ස්වල්පදෙනෙකු හැරෙන්නට පොළොවෙහි දූෂණය වළක්වන්නාවූ අවබෝධයෙන් යුත් පුද්ගලයින් නොසිටියේ මන්ද? නමුත් වැරදි කරන්නවුන් තමන්ට සුව පහසුව සලසනලද දේ පමණක් අනුගමනය කළහ. තවද ඔවුහු වරදකරුවන් බවට පත්වූහ.

وَمَا كَانَ رَبُّكَ لِيُهۡلِكَ الۡقُرٰى بِظُلۡمٍ وَّاَهۡلُهَا مُصۡلِحُوۡنَ ﴿۱۱۸﴾

118. තවද එහි මිනිසුන් ධාර්මිෂ්ඨකව ක්‍රියාකර සිටියදී නගරයන් අයුක්තිසහගත ලෙස ඔබගේ අධිපතියාණන් විනාශ නොකරන්නේය.

وَلَوۡ شَآءَ رَبُّكَ لَجَـعَلَ النَّاسَ اُمَّةً وَّاحِدَةً‌ وَّلَا يَزَالُوۡنَ مُخۡتَلِفِيۡنَ ۙ ﴿۱۱۹﴾

119. තවද ඔබගේ අධිපතියාණන් තම අභිමතය (ක්‍රියාත්මක) කළේ නම් ඔහුට මනුෂ්‍ය වර්ගයාව එකම ජන සමූහයක් බවට පත්කරන්නට තිබුණි. එහෙත් ඔවුහු භේද භින්න අත් නොහරින්නෝය.

اِلَّا مَنۡ رَّحِمَ رَبُّكَ‌ ؕ وَلِذٰلِكَ خَلَقَهُمۡ‌ ؕ وَتَمَّتۡ كَلِمَةُ رَبِّكَ لَاَمۡلَئَنَّ جَهَنَّمَ مِنَ الۡجِنَّةِ وَالنَّاسِ اَجۡمَعِيۡنَ ﴿۱۲۰﴾

120. ඔබගේ අධිපතියාණන් දයාව දැක්වූ අය හැරෙන්නට ඔහු ඔවුන් මවා ඇත්තේ ඒ සඳහාය. එහෙත් 'ඇත්තෙන්ම මම (අකීකරු) ජින් සහ මිනිසුන් සියල්ලන්ගෙන් නිරය පුරවන්නෙමි' යන ඔබගේ අධිපතියාණන්ගේ වචනය ඉටුවනු ඇත.

وَكُلًّا نَّقُصُّ عَلَيْكَ مِنْ أَنۢبَآءِ ٱلرُّسُلِ مَا نُثَبِّتُ بِهِۦ فُؤَادَكَ ۚ وَجَآءَكَ فِى هَـٰذِهِ ٱلْحَقُّ وَمَوْعِظَةٌ وَذِكْرَىٰ لِلْمُؤْمِنِينَ ﴿١٢١﴾

121. තවද දූතයින්ගේ ආරංචියන්ගෙන් සියල්ල අපි ඔබට විස්තර කරදෙන්නෙමු. එමගින් අපි ඔබගේ හදවත ස්ථිරසාර කරන්නෙමු. තවද මෙහි ඔබ වෙත සත්‍යයද විශ්වාසිතයන් සඳහා අනුශාසනාවද සිහිකිරීමක්ද පැමිණ ඇත.

وَقُل لِّلَّذِينَ لَا يُؤْمِنُونَ ٱعْمَلُوا۟ عَلَىٰ مَكَانَتِكُمْ إِنَّا عَـٰمِلُونَ ﴿١٢٢﴾

122. තවද අවිශ්වාසිතයින්ට 'නුඹලාට හැකි පමණින් ක්‍රියා කරනු. මම(ද) ක්‍රියා කරන්නෙමි'යි පවසන්න.

وَٱنتَظِرُوٓا۟ إِنَّا مُنتَظِرُونَ ﴿١٢٣﴾

123. 'නුඹලා බලා සිටිනු, අපි (ද) බලා සිටින්නෙමු.'

وَلِلَّهِ غَيْبُ ٱلسَّمَـٰوَٰتِ وَٱلْأَرْضِ وَإِلَيْهِ يُرْجَعُ ٱلْأَمْرُ كُلُّهُۥ فَٱعْبُدْهُ وَتَوَكَّلْ عَلَيْهِ ۚ وَمَا رَبُّكَ بِغَـٰفِلٍ عَمَّا تَعْمَلُونَ ﴿١٢٤﴾

124. තවද අහස්හි සහ පොළොවෙහි ගුප්ත දේ අල්ලාහ්ටම අයත්ය. සියළු කටයුතු ඔහු වෙත යොමු කෙරෙනු ඇත. එබැවින් ඔහුට නමදින්න. ඔහු කෙරෙහි (පමණක්) ඔබගේ විශ්වාසය තබන්න. ඔබ කරනදේ පිළිබඳව ඔබගේ අධිපතියාණන් නොසැළකිලිමත් නොවේ.



යූසුෆ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද, පරම දයාබර වූද, අල්ලාහ්ගේ නාමයෙන්.

الٓرٰ‌ تِلۡكَ اٰيٰتُ الۡكِتٰبِ الۡمُبِيۡنِ ②

2. අලිෆ්, ලාම්, රා.◆ මේවා පැහැදිලි ග්‍රන්ථයේ වාක්‍යයන් වේ.

اِنَّاۤ اَنۡزَلۡنٰهُ قُرۡءٰنًا عَرَبِيًّا لَّعَلَّكُمۡ تَعۡقِلُوۡنَ ③

3. නුඹලා වටහා ගනු පිණිස අපි මෙය (පැහැදිලිව තේරුම් ගැනීමට බහුලව පාරායනය කරනු ලබන ග්‍රන්ථයක් වශයෙන්) අරාබියෙන් කුර්ආනය පහළකර ඇත්තෙමු.

نَحۡنُ نَقُصُّ عَلَيۡكَ اَحۡسَنَ الۡقَصَصِ بِمَاۤ اَوۡحَيۡنَاۤ اِلَيۡكَ هٰذَا الۡقُرۡاٰنَ ‌‌ۖ وَاِنۡ كُنۡتَ مِنۡ قَبۡلِهٖ لَمِنَ الۡغٰفِلِيۡنَ ④

4. මීට පෙර ඔබ නොදැනුවත් අයගෙන් කෙනෙකුව සිටියදී, අපි මෙම කුර්ආනය ඔබට අනාවරණය කළෙමු. එමගින් අපි ඔබ වෙත ඉතා අලංකාරවූ වෘතාන්තය විස්තර කරන්නෙමු.

اِذۡ قَالَ يُوۡسُفُ لِاَبِيۡهِ يٰۤاَبَتِ اِنِّىۡ رَاَيۡتُ اَحَدَ عَشَرَ كَوۡكَبًا وَّالشَّمۡسَ وَالۡقَمَرَ رَاَيۡتُهُمۡ لِىۡ سٰجِدِيۡنَ ⑤

5. යූසුෆ් තම පියාණන්ට, 'එම්බල මාගේ පියාණනි! තාරකා එකොළහක්ද, සූර්යයා සහ චන්ද්‍රයාද මම (සිහිනෙන්) දුටුවෙමි. ඒවා මා හට අවනතවනු මම දුටුවෙමි'යි පැවසූ කල්හි (එම අවස්ථාව සිහිපත් කරන්න).

قَالَ يٰبُنَىَّ لَا تَقۡصُصۡ رُءۡيَاكَ عَلٰٓى اِخۡوَتِكَ فَيَكِيۡدُوۡا لَكَ كَيۡدًا‌ؕ اِنَّ الشَّيۡطٰنَ لِلۡاِنۡسَانِ عَدُوٌّ مُّبِيۡنٌ ⑥

6. ඔහු 'එම්බල මාගේ දයාබර පුත්‍රයාණනි! ඔබගේ සිහිනය ඔබගේ සොහොයුරන්ට නොකියන්න. නැතහොත් ඔවුන් ඔබට එරෙහිව උපායක් යොදනු ඇත. මක්නිසාද යත් ෂෙයිතාන් මිනිසාට විවෘත සතුරෙකු වන්නේය'යි කීවේය.

وَكَذٰلِكَ يَجۡتَبِيۡكَ رَبُّكَ وَيُعَلِّمُكَ مِنۡ

7. 'තවද මෙයාකාරයට (ඔබ සිහිනෙන් දුටු පරිදි) ඔබගේ

◆ මම අල්ලාහ් සියල්ල, දකින්නා වෙමි.

تَأْوِيلِ الْأَحَادِيثِ وَيُتِمُّ نِعْمَتَهُ عَلَيْكَ وَعَلَىٰ آلِ يَعْقُوبَ كَمَا أَتَمَّهَا عَلَىٰ أَبَوَيْكَ مِن قَبْلُ إِبْرَاهِيمَ وَإِسْحَاقَ ۚ إِنَّ رَبَّكَ عَلِيمٌ حَكِيمٌ ﴿٧﴾

අධිපතියාණන් ඔබව තෝරාගෙන ඔබට සිද්ධීන් පිළිබඳව අර්ථකථනය උගන්වනු ඇත. තවද මීට පෙර ඔබගේ මුතුන් මිත්තන් ඉබ්රාහිම් සහ ඉස්හාක් යන දෙදෙනා කෙරෙහි ඔහු පරිපූර්ණ කළාක් මෙන්, ඔබ කෙරෙහිද, යඃකූබ්ගේ පවුලේ අය කෙරෙහිද ඔහුගේ අනුග්‍රහය පරිපූර්ණ කරනු ඇත. ඇත්තෙන්ම ඔබගේ අධිපතියාණන් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය'.

لَّقَدْ كَانَ فِي يُوسُفَ وَإِخْوَتِهِ آيَاتٌ لِّلسَّائِلِينَ ﴿٨﴾

8. නියතවශයෙන්ම යූසුෆ් සහ ඔහුගේ සොහොයුරන්(ගේ සිද්ධීන්) තුළ විමසන්නන් හට (බොහෝ) සළකුණු ඇත.

إِذْ قَالُوا لَيُوسُفُ وَأَخُوهُ أَحَبُّ إِلَىٰ أَبِينَا مِنَّا وَنَحْنُ عُصْبَةٌ إِنَّ أَبَانَا لَفِي ضَلَالٍ مُّبِينٍ ﴿٩﴾

9. එවිට ඔවුහු 'අප ශක්තිමත් පිරිසක් වුවද ඇත්තෙන්ම අපගේ පියාණන්ට අපට වඩා යූසුෆ් සහ ඔහුගේ සහෝදරයා හිතවත්ය. අපගේ පියාණන් නියතවශයෙන්ම ප්‍රකට වරදෙහියැ'යි කීහ.

اقْتُلُوا يُوسُفَ أَوِ اطْرَحُوهُ أَرْضًا يَخْلُ لَكُمْ وَجْهُ أَبِيكُمْ وَتَكُونُوا مِن بَعْدِهِ قَوْمًا صَالِحِينَ ﴿١٠﴾

10. 'යූසුෆ්ව මරාදමනු. නැතහොත් යම් (ඈත) තැනකට ඔහුව ගෙන ගොස් දමනු. එවිට නුඹලාගේ පියාණන්ගේ අවධානය මුළුමනින්ම නුඹලා වෙත යොමුවන අතර ඉන්පසු නුඹලාට ධාර්මිෂ්ඨ ජන පිරිසක් විය හැකිය'.

قَالَ قَائِلٌ مِّنْهُمْ لَا تَقْتُلُوا يُوسُفَ وَأَلْقُوهُ فِي غَيَابَتِ الْجُبِّ يَلْتَقِطْهُ بَعْضُ السَّيَّارَةِ إِن كُنتُمْ فَاعِلِينَ ﴿١١﴾

11. ඔවුන්ගෙන් කෙනෙක් 'යූසුෆ්ව මරා නොදමනු. එහෙත් නුඹලා යමක් කළ යුතු වේ නම් ඔහුව ගැඹුරු ළිං පතුලකට ඇද දමනු. ගමනේ යෙදෙන පිරිසකගෙන් සමහරෙක් ඔහුව ගොඩ ගනු ඇතැ'යි කීවේය.

قَالُوا يَا أَبَانَا مَا لَكَ لَا تَأْمَنَّا عَلَىٰ يُوسُفَ وَإِنَّا لَهُ لَنَاصِحُونَ ﴿١٢﴾

12. ඔවුහු 'එම්බල අපගේ පියාණනි! යූසුෆ් සම්බන්ධයෙන් ඔබ අප කෙරෙහි විශ්වාසය නොතබන්නේ ඇයි? නියතවශයෙන්ම අපි ඔහුට අවංකවම යහපත පතන්නන් වෙමු'යි කීහ.

13. 'ඔහුව හෙට අප සමඟ එවන්න. ඔහු විනෝද වනු ඇත. තවද සෙල්ලම් කරනු ඇත. තවද නියතවශයෙන්ම අපි ඔහුව රැකබලා ගන්නෙමු.'

أَرْسِلْهُ مَعَنَا غَدًا يَرْتَعْ وَيَلْعَبْ وَإِنَّا لَهُ لَحَافِظُونَ ﴿١٣﴾

14. 'නුඹලා ඔහුව රැගෙන යෑම ඇත්තෙන්ම මාව කණස්සල්ලට පත්කරයි. නුඹලා ඔහු ගැන නොසැලකිලිමත් වනවිට වෘකයෙක් ඔහුව කා දමනු ඇතැයි මම බියවෙමි'යි ඔහු කිවේය.

قَالَ إِنِّي لَيَحْزُنُنِي أَنْ تَذْهَبُوا بِهِ وَأَخَافُ أَنْ يَأْكُلَهُ الذِّئْبُ وَأَنْتُمْ عَنْهُ غَافِلُونَ ﴿١٤﴾

15. ඔවුහු 'අපි ශක්තිමත් පිරිසක්ව සිටිත්දී වෘකයා ඔහුව කා දැමුවහොත් අපි අන්ත පරාජිතයින් වන්නෙමු'යි කීහ.

قَالُوا لَئِنْ أَكَلَهُ الذِّئْبُ وَنَحْنُ عُصْبَةٌ إِنَّا إِذًا لَخَاسِرُونَ ﴿١٥﴾

16. පසුව ඔවුන් ඔහුව රැගෙන ගොස් ගැඹුරු ලිං පතුලට දැමීමට එකඟවූ විට අපි ඔහු වෙත (මෙසේ) පවසමින් 'ඔවුන් (ඔබ කවරෙක්ද යන වග) නොදැන සිටිත්දී ඔබ ඔවුන්ගේ මෙම කාර්‍යය පිළිබඳව (එක් දවසක) ඔවුන්ට නියතවශයෙන්ම දැනුම් දෙන්නෙහියැ'යි. අනාවරණයක් කළෙමු.

فَلَمَّا ذَهَبُوا بِهِ وَأَجْمَعُوا أَنْ يَجْعَلُوهُ فِي غَيَابَتِ الْجُبِّ ۚ وَأَوْحَيْنَا إِلَيْهِ لَتُنَبِّئَنَّهُمْ بِأَمْرِهِمْ هَٰذَا وَهُمْ لَا يَشْعُرُونَ ﴿١٦﴾

17. තවද රාත්‍රි සමයේ ඔවුහු වැළපෙමින් තමන්ගේ පියාවෙත පැමිණියහ.

وَجَاءُوا أَبَاهُمْ عِشَاءً يَبْكُونَ ﴿١٧﴾

18. 'එම්බල අපගේ පියාණෙනි! අපි එකිනෙකා අතර දුවමින් පෙරට ගියෙමු. තවද අපගේ භාණ්ඩයන් අසල යූසුෆ්ව හැර ගියෙමු. එවිට වෘකයා ඔහුව කා දැමීය. එහෙත් අපි සත්‍යය පැවසුවද ඔබ අපව විශ්වාස කරන්නේ නැතැ' යි ඔවුහු කීහ.

قَالُوا يَا أَبَانَا إِنَّا ذَهَبْنَا نَسْتَبِقُ وَتَرَكْنَا يُوسُفَ عِنْدَ مَتَاعِنَا فَأَكَلَهُ الذِّئْبُ ۖ وَمَا أَنْتَ بِمُؤْمِنٍ لَنَا وَلَوْ كُنَّا صَادِقِينَ ﴿١٨﴾

19. තවද ඔවුහු ඔහුගේ කමිසය මත ව්‍යාජ ලේ තවරාගෙන ආහ. 'නොඑසේය, නමුත් නුඹලාගේ සිත් මෙම (පාපකාරී) ක්‍රියාව නුඹලාට අලංකාර ලෙස පෙනීමට සැලැස්විය.

وَجَاءُوا عَلَىٰ قَمِيصِهِ بِدَمٍ كَذِبٍ ۚ قَالَ بَلْ سَوَّلَتْ لَكُمْ أَنْفُسُكُمْ أَمْرًا ۖ فَصَبْرٌ

එමනිසා (දැන්) උදාර ඉවසීම (මා හට යහපත්)ය. නුඹලා තරයේ ප්‍රකාශ කරන දෙයට එරෙහිව පිහිට පැතිය යුත්තේ අල්ලාහ්ගෙන් (පමණ)යැ'යි ඔහු කීවේය.

جَمِيلٌ ۖ وَاللَّهُ الْمُسْتَعَانُ عَلَىٰ مَا تَصِفُونَ ﴿١٩﴾

20. තවද (එතැනට) තවලම් පිරිසක් පැමිණියහ. පසුව ඔවුහු තමන්ගේ වතුර අදින්නෙකුව යැවූහ. තවද ඔහු තමාගේ පනිට්ටුව (ලිඳට) දැමුවේය. 'හෝ! සුභාරංචියකි!' යි ඔහු කීවේය. 'මෙන්න බාලයෙක්!' තවද ඔවුහු වෙළඳ භාණ්ඩයක්සේ ඔහුව සඟවා තැබූහ. තවද ඔවුන් කළ දේ අල්ලාහ් මැනැවින් දැන සිටියේය.

وَجَاءَتْ سَيَّارَةٌ فَأَرْسَلُوا وَارِدَهُمْ فَأَدْلَىٰ دَلْوَهُ ۖ قَالَ يَا بُشْرَىٰ هَٰذَا غُلَامٌ ۚ وَأَسَرُّوهُ بِضَاعَةً ۚ وَاللَّهُ عَلِيمٌ بِمَا يَعْمَلُونَ ﴿٢٠﴾

21. තවද ඔවුහු ඔහුව අල්ප මිලකට, දිර්හාම් ස්වල්පයකට, විකුණා දැමූහ. තවද ඔවුහු ඔහුගෙන් ලාභ ලැබීමට උනන්දු නොවූහ.

وَشَرَوْهُ بِثَمَنٍ بَخْسٍ دَرَاهِمَ مَعْدُودَةٍ وَكَانُوا فِيهِ مِنَ الزَّاهِدِينَ ﴿٢١﴾

22. තවද ඊජිප්තුවෙන් ඔහුව මිළදී ගත් තැනැත්තා තම බිරිඳට (මෙසේ) කීවේය. 'ඔහුගේ පදිංචිය ගෞරවාන්විත කරන්න. ඔහු අපට ප්‍රයෝජනවත් විය හැක. නැතහොත් අපි ඔහුව පුතෙකු ලෙස හදාවඩා ගනිමු.' තවද මේ ආකාරයට අපි යූසුෆ්ව පොළොවෙහි ස්ථාපිත කළෙමු. තවද (අප එසේ කළේ) සිද්ධීන් පිළිබඳව අර්ථකථනය අප ඔහුට උගන්වන්නටය. තවද අල්ලාහ් තමාගේ නියමය කෙරෙහි පූර්ණ බලය ඇත්තාය. එහෙත් බොහෝ මිනිසුන් (එය) නොදනිති.

وَقَالَ الَّذِي اشْتَرَاهُ مِنْ مِصْرَ لِامْرَأَتِهِ أَكْرِمِي مَثْوَاهُ عَسَىٰ أَنْ يَنْفَعَنَا أَوْ نَتَّخِذَهُ وَلَدًا ۚ وَكَذَٰلِكَ مَكَّنَّا لِيُوسُفَ فِي الْأَرْضِ وَلِنُعَلِّمَهُ مِنْ تَأْوِيلِ الْأَحَادِيثِ ۚ وَاللَّهُ غَالِبٌ عَلَىٰ أَمْرِهِ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَعْلَمُونَ ﴿٢٢﴾

23. තවද ඔහු තමාගේ වැඩිවියට එළඹූ විට අපි ඔහුට විනිශ්චයේ නිපුණත්වයත් දැනුමත් පිරිනැමුවෙමු. තවද මෙලෙසම අපි යහපත කරන්නන්ට තිළිණ කරන්නෙමු.

وَلَمَّا بَلَغَ أَشُدَّهُ آتَيْنَاهُ حُكْمًا وَعِلْمًا ۚ وَكَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ﴿٢٣﴾

24. තවද ඇය තම නිවසෙහි සිටි ඔහුව ඔහුගේ කැමැත්තට පටහැනිව වරදට පොළඹවා ගැනීමට තැත් කළාය. තවද ඇය දොරවල් අගුළුලා 'මෙහෙ එන්නැ'යි කීවාය. ඔහු 'මම අල්ලාහ්ගේ රැකවරණය පතමි. ඔහු මාගේ අධිපතියාණන්ය. ඔහු මාගේ පදිංචිය (ඔබ සමඟ) ගෞරවාන්විත කර ඇත. ඇත්තෙන්ම වැරදිකරන්නන් කිසිවිටෙකත් ජය නොලබන්නෝයැ'යි කීවේය.

وَرَاوَدَتۡهُ الَّتِىۡ هُوَ فِىۡ بَيۡتِهَا عَنۡ نَّفۡسِهٖ وَغَلَّقَتِ الۡاَبۡوَابَ وَقَالَتۡ هَيۡتَ لَكَ‌ ؕ قَالَ مَعَاذَ اللّٰهِ‌ اِنَّهٗ رَبِّىۡۤ اَحۡسَنَ مَثۡوَاىَ‌ ؕ اِنَّهٗ لَا يُفۡلِحُ الظّٰلِمُوۡنَ‏ ﴿۲۴﴾

25. තවද ඇය ඔහු ගැන දැඩි කැමැත්තක් ඇති කර ගත්තාය. එමෙන්ම ඔහු තම අධිපතියාණන්ගේ සලකුණ නොදුටුවේ නම් ඔහු(ද) ඇය කෙරෙහි කැමැත්තක් ඇති කරගන්නට තිබුණි. අප මෙලෙස කළේ ඔහු වෙතින් නපුර සහ අසභ්‍යකම ඉවත් කරන්නටය. නියතවශයෙන්ම ඔහු තෝරාගනු ලැබූ අපගේ දාසයන්ගෙන් කෙනෙකු විය.

وَلَقَدۡ هَمَّتۡ بِهٖ‌ ۚ وَهَمَّ بِهَا لَوۡلَاۤ اَنۡ رَّاٰ بُرۡهَانَ رَبِّهٖ‌ ؕ كَذٰلِكَ لِنَصۡرِفَ عَنۡهُ السُّوۡۤءَ وَالۡفَحۡشَآءَ‌ ؕ اِنَّهٗ مِنۡ عِبَادِنَا الۡمُخۡلَصِيۡنَ‏ ﴿۲۵﴾

26. තවද ඔවුන් දෙදෙනා එකිනෙකා අභිබවමින් දොර වෙත දිව ගියහ. තවද ඇය ඔහුගේ කමිසය පිටුපසින් ඉරා දැමුවාය. තවද ඔවුන් (දෙදෙනා) ඇයගේ ස්වාමියාව දොරකඩෙහි දුටුවෝය. 'ඔබගේ බිරියට නපුරක් කිරීමට අදහස් කළ කෙනෙකුට දඬුවම සිරගත කිරීම හෝ බරපතල වේදනාවක් දීමක් හැරෙන්නට අන් කුමක්දැ?' යි ඇය කීවාය.

وَاسۡتَبَقَا الۡبَابَ وَقَدَّتۡ قَمِيۡصَهٗ مِنۡ دُبُرٍ وَّ اَلۡفَيَا سَيِّدَهَا لَدَا الۡبَابِ‌ ؕ قَالَتۡ مَا جَزَآءُ مَنۡ اَرَادَ بِاَهۡلِكَ سُوۡۤءًا اِلَّاۤ اَنۡ يُّسۡجَنَ اَوۡ عَذَابٌ اَلِيۡمٌ‏ ﴿۲۶﴾

27. 'මාව මාගේ කැමැත්තට පටහැනිව වරදට පොළඹවා ගැනීමට තැත් කළේ ඇයම'යි ඔහු කීවේය. තවද ඇයගේ නිවැසියන්ගෙන් සාක්ෂිකරුවෙක් 'ඔහුගේ කමිසය ඉදිරිපසින් ඉරා දමනු ලැබ් ඇත්නම් එවිට ඇය පවසා ඇත්තේ සත්‍යය වේ. තවද ඔහු බොරුකාරයන්ගෙන් යැ'යි (පවසමින්) සාක්ෂි දැරුවේය.

قَالَ هِىَ رَاوَدَتۡنِىۡ عَنۡ نَّفۡسِىۡ‌ وَشَهِدَ شَاهِدٌ مِّنۡ اَهۡلِهَا‌ ۚ اِنۡ كَانَ قَمِيۡصُهٗ قُدَّ مِنۡ قُبُلٍ فَصَدَقَتۡ وَهُوَ مِنَ الۡكٰذِبِيۡنَ‏ ﴿۲۷﴾

وَاِنْ كَانَ قَمِيْصُهٗ قُدَّ مِنْ دُبُرٍ فَكَذَبَتْ وَهُوَ مِنَ الصّٰدِقِيْنَ ﴿۲۸﴾

28. එහෙත් ඔහුගේ කමිසය පිටුපසින් ඉරා දමනු ලැබී ඇත්නම් ඇය බොරු කිව්වාය. තවද ඔහු සත්‍යයවාදීන්ගෙන්ය.

فَلَمَّا رَاٰ قَمِيْصَهٗ قُدَّ مِنْ دُبُرٍ قَالَ اِنَّهٗ مِنْ كَيْدِكُنَّ ؕ اِنَّ كَيْدَكُنَّ عَظِيْمٌ ﴿۲۹﴾

29. එබැවින් හෙතෙම ඔහුගේ කමිසය පිටුපසින් ඉරා දමා තිබෙනු දුටුවිට 'නියතවශයෙන්ම මෙය ගැහැණුන් වන නුඹලාගේ උපායකි. නුඹලාගේ උපාය ඇත්තෙන්ම බලවත්යැ'යි ඔහු කීවේය.

يُوْسُفُ اَعْرِضْ عَنْ هٰذَا ٚ وَاسْتَغْفِرِيْ لِذَنْۢبِكِ ۖۚ اِنَّكِ كُنْتِ مِنَ الْخٰطِـِٕيْنَ ﴿۳۰﴾

30. 'එම්බල යූසුෆ්, මෙය අතහැර දමන්න. තවද (එම්බා ගැහැණිය) නුඹ තම පාපය වෙනුවෙන් සමාව අයැදිනු. නිසැකවම නුඹ වරදකරුවන්ගෙන් වේ.'

وَقَالَ نِسْوَةٌ فِى الْمَدِيْنَةِ امْرَاَتُ الْعَزِيْزِ تُرَاوِدُ فَتٰىهَا عَنْ نَّفْسِهٖ ۚ قَدْ شَغَفَهَا حُبًّا ؕ اِنَّا لَنَرٰىهَا فِىْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿۳۱﴾

31. තවද 'එම අzසී zස් (ප්‍රධානියා) ගේ බිරිය ඇගේ වහල් තරුණයාව ඔහුගේ කැමැත්තට එරෙහිව වරදට පොළඹවා ගැනීමට තැත්කරයි. ඔහුව ඇයගේ හදතුළ ප්‍රේමයෙන් මෝහනය කරගෙන ඇත. ඇත්තෙන්ම අපි ඇයව ප්‍රකට වරදෙහි දකිමු'යි නගරයෙහි ස්ත්‍රීහු කීහ.

فَلَمَّا سَمِعَتْ بِمَكْرِهِنَّ اَرْسَلَتْ اِلَيْهِنَّ وَاَعْتَدَتْ لَهُنَّ مُتَّكَاً وَّاٰتَتْ كُلَّ وَاحِدَةٍ مِّنْهُنَّ سِكِّيْنًا وَّقَالَتِ اخْرُجْ

* 32. තවද ඇය ඔවුන්ගේ (කපටි) සැලසුම ගැන ඇසූ විට ඇය ඔවුන්ට ඇරයුම් කළාය. තවද ඔවුන් වෙනුවෙන් හාන්සි වී සුවපහසුවෙන් අසුන් ගත හැකි ස්ථානයක් පිළියෙල කළාය. තවද ඔවුන්ගෙන් හැම

---

* සටහන. 32: ශුද්ධ කුර්ආනයෙහි 'කත්තඃන අයිදියහුන්න' ( قَطَّعْنَ اَيْدِيَهُنَّ ) (තමන්ගේ අත් කපාගත්හ) යන මෙම වචනයේ දෙවිධ භාවිතය සම්බන්ධයෙන් හස්රත් ඉමාම් රාගිබ් (රහ්) තුමා සඳහන් කර ඇති පරිදි මෙය වචනානුසාරයෙන් හෝ උපමානුසාරයෙන් හෝ යොදා තේරුම් ගත හැක.
මෙහි ( قَطَّعْنَ اَيْدِيَهُنَّ )යන්නෙහි වචනානුසාර අර්ථය වනුයේ යම්කිසි තියුණු ආයුධයකින් යමෙක් තමාගේ අත කපා දැමීමය. මෙම අර්ථය පැහැදිලිව කුර්ආනය මගින් නොදෙන අතර එය මෙම පාඨයෙහි සිතා ගත නොහැකිය. එය වෙනුවට සමහර උගතුන් එයට ඉතා සුළු කැපුම් පමණක් යැයි විදහා දක්වමින් සුළු කැපීමක් ලෙස ආදේශ කිරීමට තැත් කර ඇත. නමුත් අරාබි ව්‍යවහාරය එය සනාථ කිරීමට ඉඩ නොදේ. මන්දයත් قَطَّعَ (යන වචනයේ පරිමාණයෙහි) මූලාර්ථයේ බරපතලකම මෙම සියුම් අර්ථකථනයට අනුමැතිය නොදේ. වචනානුසාර සහ උපමානුසාර අර්ථය අතර එකම තේරීම විය යුත්තේ උපමානුසාර අර්ථයෙන් නිවැරදිව දී ඇති පාඨයෙහි මෙම පදය තේරුම් ගැනීම කෙරෙහි අප විශ්වාස කිරීමයි. එනම් ඔහු (යූසුෆ්) ගැන සැලකිලිමත් වීම මගින් ඔවුන් (ස්ත්‍රීන්) තමන්ට ලඟා විය නොහැකි පරාජයක් පිළිගත් බවය.

عَلَيۡهِنَّۖ فَلَمَّا رَأَيۡنَهُۥٓ أَكۡبَرۡنَهُۥ وَقَطَّعۡنَ أَيۡدِيَهُنَّ وَقُلۡنَ حَٰشَ لِلَّهِ مَا هَٰذَا بَشَرًاۖ إِنۡ هَٰذَآ إِلَّا مَلَكٞ كَرِيمٞ ٣٢

අයෙකුටම පිහියක් බැගින් දී (යූසුෆ්ට) 'ඔවුන් ඉදිරියට එන්න'යි කීවාය. තවද, ඔවුන් ඔහුව දුටු විට ඔවුන් ඔහුව ඉතා උතුම් යැයි සිතා තමන්ගේ අත් කපාගත්හ. තවද, 'අල්ලාහ් සුවිශුද්ධය! මේ නම් මනුෂ්‍යයෙකු නොවේ. මේ නම් උතුම් සුරදූතයෙක්යැ'යි කීහ.

قَالَتۡ فَذَٰلِكُنَّ ٱلَّذِي لُمۡتُنَّنِي فِيهِۖ وَلَقَدۡ رَٰوَدتُّهُۥ عَن نَّفۡسِهِۦ فَٱسۡتَعۡصَمَۖ وَلَئِن لَّمۡ يَفۡعَلۡ مَآ ءَامُرُهُۥ لَيُسۡجَنَنَّ وَلَيَكُونٗا مِّنَ ٱلصَّٰغِرِينَ ٣٣

33. 'නුඹලා කා සම්බන්ධයෙන් මා හට දොස් පැවරුවේද, ඔහු මොහුමය. ඔහුගේ කැමැත්තට පටහැනිව මම ඔහුව වරදට පොළඹවාගැනීමට තැත් කළෙමි. එහෙත් ඔහු තමාව (පාපයෙන්) ආරක්ෂා කර ගත්තේය. තවද, දැන් මා ඔහුට අණකරන දේ ඔහු නොකළහොත් නිසැකවම ඔහු සිරගත වනු ඇත. තවද, අවමානයට පත්වන්නන්ගෙන් (කෙනෙක්) වන්නේයැ'යි ඇය කීවාය.

قَالَ رَبِّ ٱلسِّجۡنُ أَحَبُّ إِلَيَّ مِمَّا يَدۡعُونَنِيٓ إِلَيۡهِۖ وَإِلَّا تَصۡرِفۡ عَنِّي كَيۡدَهُنَّ أَصۡبُ إِلَيۡهِنَّ وَأَكُن مِّنَ ٱلۡجَٰهِلِينَ ٣٤

34. ඔහු 'මාගේ අධිපතියාණෙනි! ඔවුන් මාව කැඳවන දෙයට වඩා මා සිරගෙයට වැඩියෙන් කැමැති වන්නෙමි. ඔබ ඔවුන්ගේ කපටිකමින් මාව ඉවත් නොකරන්නේ නම් මා ඔවුන් වෙතට නැඹුරු වන්නටද අඥානයන්ගෙන් කෙනෙකු වන්නටද ඉඩ ඇතැ'යි කීවේය.

فَٱسۡتَجَابَ لَهُۥ رَبُّهُۥ فَصَرَفَ عَنۡهُ كَيۡدَهُنَّۚ إِنَّهُۥ هُوَ ٱلسَّمِيعُ ٱلۡعَلِيمُ ٣٥

35. එබැවින් ඔහුගේ අධිපතියාණන් ඔහුගේ ප්‍රාර්ථනාව පිළිගත්තේය. තවද, ඔවුන්ගේ කපටිකමින් ඔහුව වැළැක්වූයේය. සැබැවින්ම ඔහු සියල්ල අසන්නාද සියල්ල දන්නාද වේ.

ثُمَّ بَدَا لَهُم مِّنۢ بَعۡدِ مَا رَأَوُاْ ٱلۡأٓيَٰتِ لَيَسۡجُنُنَّهُۥ حَتَّىٰ حِينٖ ٣٦

36. පසුව (ඔහුගේ නිර්දෝෂීභාවයේ) එම සළකුණු ඔවුන් (සමාජ නායකයින්) දැකගත් පසු ඔවුන් (තමන්ගේ ගරුනාමය ආරක්ෂා කර ගැනීම සඳහා) ඔහුව කලකට සිරගත කිරීමට ඔවුනට සිදුවිය.

37. තවද, ඔහු සමඟ තරුණයන් දෙදෙනෙක්ද සිරගෙයට ඇතුළුවූහ. ඔවුන්ගෙන් එක් අයෙක් 'මම මාව (සිහිනෙන්) මත්පැන් සඳහා මිදි මිරිකනු දුටුවෙමි'යි කීවේය. තවද, අනෙකා 'මගේ ඔළුව මත රොටි ගෙනයමින් සිටියදී එයින් කුරුල්ලන් කන බව මම මාව (සිහිනෙන්) දුටුවෙමි. මෙහි අර්ථකථනය අපට කියාදෙන්න. අපි ඔබව ධාර්මිෂ්ඨකයින්ගෙන් දකින්නෙමු'යි කීවේය.

وَدَخَلَ مَعَهُ السِّجْنَ فَتَيٰنِ ؕ قَالَ اَحَدُهُمَاۤ اِنِّیۡۤ اَرٰىنِیۡۤ اَعۡصِرُ خَمۡرًا ۚ وَقَالَ الۡاٰخَرُ اِنِّیۡۤ اَرٰىنِیۡۤ اَحۡمِلُ فَوۡقَ رَاۡسِیۡ خُبۡزًا تَاۡكُلُ الطَّیۡرُ مِنۡهُ ؕ نَبِّئۡنَا بِتَاۡوِیۡلِهٖ ۚ اِنَّا نَرٰىكَ مِنَ الۡمُحۡسِنِیۡنَ ﴿۳۷﴾

38. 'නුඹලා (දෙදෙනා)ට දෙනු ලබන ආහාර නුඹලා වෙතට නොඑන්නේය. එහෙත් එය නුඹලා වෙත ඒමට පෙර මම එහි අර්ථකථනය ගැන නුඹලාට කියා දෙන්නෙමි. මෙය මාගේ අධිපතියාණන් මා හට උගන්වා ඇති දේ හේතුවෙනි. අල්ලාහ් කෙරෙහි විශ්වාස නොකරන එමෙන්ම පරලොව ගැන විශ්වාස නොකරන්නන් වන ජනතාවගේ ආගම මම හැර දමා ඇත්තෙමි'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالَ لَا یَاۡتِیۡكُمَا طَعَامٌ تُرۡزَقٰنِهٖۤ اِلَّا نَبَّاۡتُكُمَا بِتَاۡوِیۡلِهٖ قَبۡلَ اَنۡ یَّاۡتِیَكُمَا ؕ ذٰلِكُمَا مِمَّا عَلَّمَنِیۡ رَبِّیۡ ؕ اِنِّیۡ تَرَكۡتُ مِلَّةَ قَوۡمٍ لَّا یُؤۡمِنُوۡنَ بِاللّٰهِ وَهُمۡ بِالۡاٰخِرَةِ هُمۡ كٰفِرُوۡنَ ﴿۳۸﴾

39. 'තවද, මාගේ පියවරුන් වන ඉබ්රාහිම්, ඉස්හාක් සහ යඃකූබ් (යන අයගේ) ආගම මම අනුගමනය කර ඇත්තෙමි. අල්ලාහ්ට කිසිවක් සමාන තැබීම ඇත්තෙන්ම අපට කළ නොහැක. මෙය අප කෙරෙහි සහ මිනිස් වර්ගයා කෙරෙහි වන අල්ලාහ්ගේ වරප්‍රසාදයකි. එහෙත් බොහෝ මිනිසුන් කෘතඥ නොවෙති'.

وَاتَّبَعۡتُ مِلَّةَ اٰبَآءِیۡۤ اِبۡرٰهِیۡمَ وَاِسۡحٰقَ وَیَعۡقُوۡبَ ؕ مَا كَانَ لَنَاۤ اَنۡ نُّشۡرِكَ بِاللّٰهِ مِنۡ شَیۡءٍ ؕ ذٰلِكَ مِنۡ فَضۡلِ اللّٰهِ عَلَیۡنَا وَعَلَى النَّاسِ وَلٰـكِنَّ اَكۡثَرَ النَّاسِ لَا یَشۡكُرُوۡنَ ﴿۳۹﴾

40. 'එම්බල මාගේ සිරගෙයි සගයින් දෙදෙනාණෙනි! වඩා ශ්‍රේෂ්ඨ වන්නේ නානාප්‍රකාර අධිපතිවරුන්ද නැතහොත් පරම මහෝත්තම එකම අල්ලාහ්ද?'

یٰصَاحِبَیِ السِّجۡنِ ءَاَرۡبَابٌ مُّتَفَرِّقُوۡنَ خَیۡرٌ اَمِ اللّٰهُ الۡوَاحِدُ الۡقَهَّارُ ؕ ﴿۴۰﴾

*41. 'නුඹලා ඔහු හැර නැමදුම් කරන්නේ නුඹලා සහ නුඹලාගේ පියවරුන් (හුදෙක්) නම්කර ඇති නාමයන්ටම මිස අන් කිසිවෙකුට නොවේ. ඒ සඳහා අල්ලාහ් කිසිදු සාධකයක් පහළ කර නොමැත. තීරණය ඇත්තේ අල්ලාහ් වෙත පමණයි. ඔහු හැරෙන්නට අන් කිසිවෙකු නුඹලා නොනැමදිය යුතු බවට ඔහු අණ කර ඇත. එයම සැබෑ ආගමකි. එහෙත් බොහෝ මිනිසුන් (එය) නොදනිති'.

مَا تَعۡبُدُوۡنَ مِنۡ دُوۡنِهٖۤ اِلَّاۤ اَسۡمَآءً سَمَّيۡتُمُوۡهَاۤ اَنۡتُمۡ وَاٰبَآؤُكُمۡ مَّاۤ اَنۡزَلَ اللّٰهُ بِهَا مِنۡ سُلۡطٰنٍؕ اِنِ الۡحُكۡمُ اِلَّا لِلّٰهِؕ اَمَرَ اَلَّا تَعۡبُدُوۡۤا اِلَّاۤ اِيَّاهُؕ ذٰ لِكَ الدِّيۡنُ الۡقَيِّمُ وَلٰـكِنَّ اَكۡثَرَ النَّاسِ لَا يَعۡلَمُوۡنَ ﴿۴۱﴾

42. 'එම්බල මාගේ සිරගෙයි සගයින් දෙදෙනාණෙනි! නුඹලා දෙදෙනාගෙන් එක් කෙනෙක් ගත්කළ ඔහු තම ස්වාමියාට පානය සඳහා මත්පැන් වත්කර දෙන්නේය. තවද අනෙකා ගත්කළ ඔහු කුරුසය මත තබා ඇණ ගසනු ලබන අතර ඔහුගේ ඔළුවෙන් කුරුල්ලන් කනු ඇත. නුඹලා විමසූ දේ පිළිබඳව කාරණය තීන්දු කරනු ලැබ ඇත'.

يٰصَاحِبَىِ السِّجۡنِ اَمَّاۤ اَحَدُكُمَا فَيَسۡقِىۡ رَبَّهٗ خَمۡرًا ۚ وَاَمَّا الۡاٰخَرُ فَيُصۡلَبُ فَتَاۡكُلُ الطَّيۡرُ مِنۡ رَّاۡسِهٖ ؕ قُضِىَ الۡاَمۡرُ الَّذِىۡ فِيۡهِ تَسۡتَفۡتِيٰنِ ؕ‏ ﴿۴۲﴾

43. තවද ඔවුන් දෙදෙනාගෙන් නිදහස් වනු ඇතැයි ඔහු (යූසුෆ්) සිතූ තැනැත්තාට 'ඔබගේ ස්වාමියාට මා ගැන සඳහන් කරන්නැ'යි කීවේය. එහෙත් (ඒ පිළිබඳව) ඔහුගේ ස්වාමියාට සඳහන් කිරීම ෂෙයිතාන් ඔහුව අමතක කරවීය. එබැවින් ඔහු (යූසුෆ්) සිරගෙයිහි වසර කිහිපයකට රැඳී සිටියේය.

وَقَالَ لِلَّذِىۡ ظَنَّ اَنَّهٗ نَاجٍ مِّنۡهُمَا اذۡكُرۡنِىۡ عِنۡدَ رَبِّكَ فَاَنۡسٰٮهُ الشَّيۡطٰنُ ذِكۡرَ رَبِّهٖ فَلَبِثَ فِى السِّجۡنِ بِضۡعَ سِنِيۡنَ ؕ‏ ﴿۴۳﴾

44. 'තවද තරබාරු එළදෙනුන් සත් දෙනෙකුව කෙට්ටු එළදෙනුන් සත් දෙනෙක් කා දමනුද සාරවත් ගොයම් කරල් හතක්ද වියළුනු වෙනත් කරල් (හතක්)ද මම

وَقَالَ الۡمَلِكُ اِنِّىۡۤ اَرٰى سَبۡعَ بَقَرٰتٍ سِمَانٍ يَّاۡكُلُهُنَّ سَبۡعٌ عِجَافٌ وَّسَبۡعَ سُنۡۢبُلٰتٍ

*සටහන. 41: ශුද්ධ කුර්ආනයේ භාවිතයට අනුව 'කයියිම්' ( الۡقَيِّمُ ) යන වචනය ශක්තිමත්, බලවත්, නිවැරදි මෙන්ම රඳා පැවතිම සහ බලය යනුවෙන් අර්ථය ගෙනදේ. තවද එය නිවැරදි කිරීම සහ නිර්දෝෂ කිරීමේ හැකියාවද අඟවයි. එම නිසා මූලධර්මය, සියළු ආගම් වලට පොදුවූ නොවෙනස්වන විශ්වාසයේ අඩංගු ව්‍යවස්ථාවන් ලෙස අල්කුර්ආනයෙහි 'දීනුල් කයියිමාහ්' ( دِيۡنُ الۡقَيِّمَةِ ) යැයි සඳහන් කරනු ලැබේ. (අල් බයියිනාහ් 98:6 බලන්න)

خُضۡرٍ وَّ اُخَرَ يٰبِسٰتٍ ؕ يٰۤاَيُّهَا الۡمَلَاُ اَفۡتُوۡنِىۡ فِىۡ رُءۡيَاىَ اِنۡ كُنۡتُمۡ لِلرُّءۡيَا تَعۡبُرُوۡنَ ﴿٤٤﴾

(සිහිනෙන්) දකිමි. එම්බල ප්‍රධානියනි! නුඹලාට සිහිනයක අර්ථය පහදා දිය හැකිනම් මාගේ සිහිනයේ තේරුම මා හට විස්තර කර දෙනු'යි රජතුමා පැවසීය.

قَالُوۡۤا اَضۡغَاثُ اَحۡلَامٍ ۚ وَمَا نَحۡنُ بِتَاۡوِيۡلِ الۡاَحۡلَامِ بِعٰلِمِيۡنَ ﴿٤٥﴾

45. ඔවුහු 'ඒවා ව්‍යාකූල සිහිනයන් වේ. තවද එවැනි ව්‍යාකූල සිහිනයන්හි අර්ථකථනය අපි නොදනිමු'යි පිළිතුරු දුන්හ.

وَقَالَ الَّذِىۡ نَجَا مِنۡهُمَا وَادَّكَرَ بَعۡدَ اُمَّةٍ اَنَا اُنَبِّئُكُمۡ بِتَاۡوِيۡلِهٖ فَاَرۡسِلُوۡنِ ﴿٤٦﴾

46. තවද (සිරකරුවන් වන) එම දෙදෙනාගෙන් නිදහස් වී කලකට පසු (යූසුෆ්ව) මතක් කළ අයෙක් 'එහි අර්ථකථනය මම ඔබට කියා දෙන්නෙමි. එබැවින් (යූසුෆ් වෙත) මා යවන්නැ'යි කීවේය.

يُوۡسُفُ اَيُّهَا الصِّدِّيۡقُ اَفۡتِنَا فِىۡ سَبۡعِ بَقَرٰتٍ سِمَانٍ يَّاۡكُلُهُنَّ سَبۡعٌ عِجَافٌ وَّسَبۡعِ سُنۡۢبُلٰتٍ خُضۡرٍ وَّاُخَرَ يٰبِسٰتٍ ۙ لَّعَلِّىۡۤ اَرۡجِعُ اِلَى النَّاسِ لَعَلَّهُمۡ يَعۡلَمُوۡنَ ﴿٤٧﴾

47. 'යූසුෆ් සත්‍යවාදියාණෙනි! තරබාරු එළදෙනුන් සත් දෙනෙකුව කෙට්ටු එළදෙනුන් සත් දෙනෙක් කා දමනුද සාරවත් ගොයම් කරල් හතක්ද වියළුණු වෙනත් කරල් (හතක්)ද යන්නෙහි තේරුම අපට විස්තර කර දෙන්න. මිනිසුන් වෙත මා ආපසු ගිය විට ඔවුන් එය දැනගනු ඇත.'

قَالَ تَزۡرَعُوۡنَ سَبۡعَ سِنِيۡنَ دَاَبًا ۚ فَمَا حَصَدْتُّمۡ فَذَرُوۡهُ فِىۡ سُنۡۢبُلِهٖۤ اِلَّا قَلِيۡلًا مِّمَّا تَاۡكُلُوۡنَ ﴿٤٨﴾

48. ඔහු 'නුඹලා අවුරුදු සතක් නොකඩවා මහන්සිවී වපුරනු ඇත. තවද නුඹලාට කෑමට අවශ්‍ය සුළු ප්‍රමාණයක් හැරෙන්නට (අනෙක් ඒවා) එම කරල්හි තිබෙන්නට ඉඩ හරිනු'යි පිළිතුරු දුන්නේය.

ثُمَّ يَاۡتِىۡ مِنۡۢ بَعۡدِ ذٰلِكَ سَبۡعٌ شِدَادٌ يَّاۡكُلۡنَ مَا قَدَّمۡتُمۡ لَهُنَّ اِلَّا قَلِيۡلًا مِّمَّا تُحۡصِنُوۡنَ ﴿٤٩﴾

49. 'අනතුරුව දුෂ්කර වූ අවුරුදු සතක් එළැඹෙනු ඇත. නුඹලා ඒ වෙනුවෙන් පෙර පිළියෙලකර ඇති දෙයින් නුඹලා ආරක්ෂා කළ සුළු ප්‍රමාණය හැර එය සියලු දේම කා දමනු ඇත.

50. පසුව ජනතාවට බහුලව වර්ෂාව දෙනු ලබන අවුරුද්දක් එළැඹෙනු ඇත. තවද එහිදී ඔවුන් (යුෂ සහ තෙල් සඳහා ඇති තරම් පළතුරුද තෙල් ඇටද) මිරිකා ගනු ඇත.'

ثُمَّ يَأْتِي مِنْۢ بَعْدِ ذَٰلِكَ عَامٌ فِيهِ يُغَاثُ النَّاسُ وَفِيهِ يَعْصِرُونَ ﴿٥٠﴾

* 51. තවද 'ඔහුව මා වෙත ගෙන එනු'යි රජතුමා පැවසීය. එහෙත් පණිවිඩකරු ඔහු වෙත පැමිණි කල්හි ඔහු 'ඔබගේ ස්වාමියා වෙත ආපසු ගොස් තමන්ගේ අත් කපාගත් ස්ත්‍රීන්ගේ තත්ත්වය කෙසේ දැයි ඔහුගෙන් අසනු. ඔවුන්ගේ කපටි සැලැස්ම පිළිබඳව මාගේ අධිපතියාණන් මැනැවින් දනි'යි කීවේය.

وَقَالَ الْمَلِكُ ائْتُونِي بِهِ ۖ فَلَمَّا جَاءَهُ الرَّسُولُ قَالَ ارْجِعْ إِلَىٰ رَبِّكَ فَاسْأَلْهُ مَا بَالُ النِّسْوَةِ اللَّاتِي قَطَّعْنَ أَيْدِيَهُنَّ ۚ إِنَّ رَبِّي بِكَيْدِهِنَّ عَلِيمٌ ﴿٥١﴾

52. ඔහු (රජතුමා) 'යූසුෆ්ගේ කැමැත්තට එරෙහිව නුඹලා ඔහුව වරදට පොළඹවා ගැනීමට තැත්කළවිට නුඹලාට කුමක් විදැ'යි (ස්ත්‍රීන්ගෙන්) ඇසීය. ඔවුන් '(මෙවැනි මනුෂ්‍යයෙක් මැවූ) අල්ලාහ් සුවිශුද්ධය. ඔහු ගැන කිසිඳු නපුරක් අපි නොදනිමු'යි කීහ. අසීසස්ගේ බිරිඳ 'දැන් සත්‍යය හෙළිවී ඇත. ඔහුගේ කැමැත්තට එරෙහිව ඔහුව වරදට පොළඹවා ගැනීමට තැත් කළේ මමයි, ඇත්තෙන්ම ඔහු සත්‍යවාදී වේ.' යැයි කීවාය.

قَالَ مَا خَطْبُكُنَّ إِذْ رَاوَدْتُّنَّ يُوسُفَ عَنْ نَّفْسِهِ ۚ قُلْنَ حَاشَ لِلَّهِ مَا عَلِمْنَا عَلَيْهِ مِنْ سُوءٍ ۚ قَالَتِ امْرَأَتُ الْعَزِيزِ الْآنَ حَصْحَصَ الْحَقُّ أَنَا رَاوَدْتُّهُ عَنْ نَّفْسِهِ وَإِنَّهُ لَمِنَ الصَّادِقِينَ ﴿٥٢﴾

53. '(මෙසේ කරුණු විමසන ලෙස මා ඉල්ලා සිටියේ) ඔහු (අසීසස්) නැති කල්හි මා ඔහුට විශ්වාස ද්‍රෝහී නොවූ බව (ඔහු දැන ගැනීම පිණිසත්) තවද වංක ජනතාවගේ උපායන් සාර්ථකවීමට අල්ලාහ් ඉඩ නොහරින බව (දැනගැනීම පිණිසත්) වේ.' (යැයි යූසුෆ් කීය).

ذَٰلِكَ لِيَعْلَمَ أَنِّي لَمْ أَخُنْهُ بِالْغَيْبِ وَأَنَّ اللَّهَ لَا يَهْدِي كَيْدَ الْخَائِنِينَ ﴿٥٣﴾

* සටහන. 51: 32 වෙනි වගන්තියේ සටහන බලන්න.

13 කොටස

54. 'තවද, මාගේ ආත්මය (පවින්) නිදොස් බව මා පොරොන්දු නොවෙමි. මාගේ අධිපතියාණන් දයාව දක්වා ඇති දේ හැර නියතවශයෙන්ම ආත්මය නපුරට අණකිරීමට නැඹුරු වන්නේය. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.'

وَمَآ أُبَرِّئُ نَفۡسِيٓۚ إِنَّ ٱلنَّفۡسَ لَأَمَّارَةُۢ بِٱلسُّوٓءِ إِلَّا مَا رَحِمَ رَبِّيٓۚ إِنَّ رَبِّي غَفُورٞ رَّحِيمٞ ٥٤

55. තවද රජතුමා 'මා ඔහුව මා වෙනුවෙන් විශේෂයෙන් තෝරා පත්කර ගැනීමට ඔහුව මාවෙත ගෙන එනු'යි කීවේය. තවද ඔහු(රජතුමා) ඔහුට(යූසුෆ්ට) කතා කළ විට ඔහු(රජතුමා) 'මෙදින ඔබ අප ඉදිරියේ ස්ථාවර වූ තත්ත්වය ලත් මෙන්ම විශ්වාසී (කෙනෙක්) වේ' යැයි කීවේය.

وَقَالَ ٱلۡمَلِكُ ٱئۡتُونِي بِهِۦٓ أَسۡتَخۡلِصۡهُ لِنَفۡسِيۖ فَلَمَّا كَلَّمَهُۥ قَالَ إِنَّكَ ٱلۡيَوۡمَ لَدَيۡنَا مَكِينٌ أَمِينٞ ٥٥

56. 'මා (හොඳ) ආරක්ෂකයෙක්ද දැනුම ඇත්තෙක්ද වන නිසා රටේ සම්පත් කෙරෙහි මාව පත්කරන්නැ'යි ඔහු කීවේය.

قَالَ ٱجۡعَلۡنِي عَلَىٰ خَزَآئِنِ ٱلۡأَرۡضِۖ إِنِّي حَفِيظٌ عَلِيمٞ ٥٦

57. තවද මේ ආකාරයට අපි යූසුෆ්ව රටෙහි ස්ථාපිත කළෙමු. එහි ඔහුට කැමති තැනක ඔහු වාසය කළේය. අප කැමති කෙනෙකුට අපි අපගේ දයාව පිරිනමන්නෙමු. තවද ධාර්මිෂ්ඨකයින්ගේ තිළිණය විනාශ වීමට අපි ඉඩ නොදෙන්නෙමු.

وَكَذَٰلِكَ مَكَّنَّا لِيُوسُفَ فِي ٱلۡأَرۡضِ يَتَبَوَّأُ مِنۡهَا حَيۡثُ يَشَآءُۚ نُصِيبُ بِرَحۡمَتِنَا مَن نَّشَآءُۖ وَلَا نُضِيعُ أَجۡرَ ٱلۡمُحۡسِنِينَ ٥٧

58. තවද විශ්වාස කර දෙවියන්ට බිය දක්වන අයට නියතවශයෙන්ම පරලොවේ තිළිණය වඩාත් යහපත්ය.

وَلَأَجۡرُ ٱلۡأٓخِرَةِ خَيۡرٞ لِّلَّذِينَ ءَامَنُواْ وَكَانُواْ يَتَّقُونَ ٥٨

59. තවද යූසුෆ්ගේ සහෝදරයෝ පැමිණ ඔහු ඉදිරියේ පෙනී සිටියහ. තවද ඔහු ඔවුන්ව හඳුනාගත්තේය. එහෙත් ඔවුහු ඔහුව හඳුනා නොගත්තෝය.

وَجَآءَ إِخۡوَةُ يُوسُفَ فَدَخَلُواْ عَلَيۡهِ فَعَرَفَهُمۡ وَهُمۡ لَهُۥ مُنكِرُونَ ٥٩

60. තවද ඔහු ඔවුන්ගේ පිවනෝපායෙන් ඔවුනට සපයා දුන්

وَلَمَّا جَهَّزَهُم بِجَهَازِهِمۡ قَالَ ٱئۡتُونِي

بِأَخٍ لَّكُم مِّنْ أَبِيكُمْ ۚ أَلَا تَرَوْنَ أَنِّي أُوفِي الْكَيْلَ وَأَنَا خَيْرُ الْمُنزِلِينَ ٦٠

විට ඔහු 'නුඹලාගේ පිය පාර්ශවයේ නුඹලාගේ සහෝදරයාව මා වෙත ගෙන එනු. මා මිනුම නුඹලාට සම්පූර්ණව ලබා දෙන බවත් ආගන්තුක සත්කාර කරන්නන්ගෙන් මා විශිෂ්ට බවත් නුඹලා නොදකින්නෙහුදැ'යි කීවේය.

فَإِن لَّمْ تَأْتُونِي بِهِ فَلَا كَيْلَ لَكُمْ عِندِي وَلَا تَقْرَبُونِ ٦١

61. 'නමුත් නුඹලා ඔහුව මා වෙත නොගෙනාවහොත් එවිට මාගෙන් නුඹලාට (ධාන්‍යයේ) මිනුම නොලැබෙනු ඇත. තවද නුඹලා මා සමීපයට නොපැමිණිය යුතුයි.'

قَالُوا سَنُرَاوِدُ عَنْهُ أَبَاهُ وَإِنَّا لَفَاعِلُونَ ٦٢

62. ඔවුහු, 'අපි ඔහුගේ පියාව ඔහුගෙන් වෙන්වීමට කැමති කරවන්නෙමු. තවද අපි නිසැකවම (එය) කරන්නෙමු'යි පිළිතුරු දුන්හ.

وَقَالَ لِفِتْيَانِهِ اجْعَلُوا بِضَاعَتَهُمْ فِي رِحَالِهِمْ لَعَلَّهُمْ يَعْرِفُونَهَا إِذَا انقَلَبُوا إِلَىٰ أَهْلِهِمْ لَعَلَّهُمْ يَرْجِعُونَ ٦٣

63. තවද ඔහු තම සේවකයන්ට 'ඔවුන් එය හඳුනාගනු පිණිස ඔවුන්ගේ මුදල් පොදිය(ද) ඔවුන්ගේ ගමන්මලු වලට දමනු. ඔවුන් තමන්ගේ පවුලේ අය වෙත ආපසු යන විට ඇතැම්විට ඔවුන් ආපසු පැමිණිය හැකි යැ'යි කීවේය.

فَلَمَّا رَجَعُوا إِلَىٰ أَبِيهِمْ قَالُوا يَا أَبَانَا مُنِعَ مِنَّا الْكَيْلُ فَأَرْسِلْ مَعَنَا أَخَانَا نَكْتَلْ وَإِنَّا لَهُ لَحَافِظُونَ ٦٤

64. තවද ඔවුන් තමන්ගේ පියාණන් වෙත ආපසු ගිය කල්හි, ඔවුහු 'එම්බල අපගේ පියාණෙනි! (තවත් ධාන්‍ය) මිනුමක් අපට ප්‍රතික්ෂේප කරන ලදී. එබැවින් අප අපගේ මිනුම ලබාගනු පිණිස අපගේ සහෝදරයාව අප සමග එවන්න. තවද අපට නියතවශයෙන්ම ඔහුව රැකබලා ගැනීමට හැකිවනු ඇතැ'යි කීහ.

قَالَ هَلْ آمَنُكُمْ عَلَيْهِ إِلَّا كَمَا أَمِنتُكُمْ عَلَىٰ أَخِيهِ مِن قَبْلُ ۖ فَاللَّهُ خَيْرٌ حَافِظًا ۖ وَهُوَ أَرْحَمُ الرَّاحِمِينَ ٦٥

65. ඔහු 'කලින් ඔහුගේ සහෝදරයා සම්බන්ධව නුඹලා කෙරෙහි මා විශ්වාසය තැබූවාක් මෙන් මිස ඔහු සම්බන්ධවත් නුඹලා කෙරෙහි මාහට විශ්වාසය තැබිය හැකිද? නමුත් අල්ලාහ් ශ්‍රේෂ්ඨ ආරක්ෂකයා මෙන්ම ඔහු දයාව දක්වන්නන්ගෙන් පරම දයාබරයැ'යි පැවසීය.

وَلَمَّا فَتَحُوا مَتَاعَهُمْ وَجَدُوا بِضَاعَتَهُمْ رُدَّتْ إِلَيْهِمْ ۖ قَالُوا يَا أَبَانَا مَا نَبْغِي ۖ هَٰذِهِ بِضَاعَتُنَا رُدَّتْ إِلَيْنَا ۖ وَنَمِيرُ أَهْلَنَا وَنَحْفَظُ أَخَانَا وَنَزْدَادُ كَيْلَ بَعِيرٍ ۖ ذَٰلِكَ كَيْلٌ يَسِيرٌ ﴿٦٦﴾

66. තවද ඔවුන් තමන්ගේ බඩු(මල්ල) විවෘත කළවිට තමන්ගේ මුදල් තමන්ට ආපසු දී ඇතිබව ඔවුහු දුටුහ. ඔවුහු 'එම්බල අපගේ පියාණෙනි! අප මීට වඩා තවත් මොනවා පතන්නද? මෙන්න, අපේ මුදල් අපට ආපසු දී තිබේ. අපි අපගේ පවුල්වලට අවශ්‍ය ජීවනෝපාය රැගෙන එන්නෙමු. තවද අපි අපගේ සහෝදරයාව රැක බලාගන්නෙමු. තවද අපි තවත් වැඩිපුර ඔටුවෙකු (තරම්) ප්‍රමාණයක් ලබා ගන්නෙමු. මෙය (ලබාගත හැකි) ඉතා පහසු ප්‍රමාණයක් යැ'යි කීහ.

قَالَ لَنْ أُرْسِلَهُ مَعَكُمْ حَتَّىٰ تُؤْتُونِ مَوْثِقًا مِنَ اللَّهِ لَتَأْتُنَّنِي بِهِ إِلَّا أَنْ يُحَاطَ بِكُمْ ۖ فَلَمَّا آتَوْهُ مَوْثِقَهُمْ قَالَ اللَّهُ عَلَىٰ مَا نَقُولُ وَكِيلٌ ﴿٦٧﴾

67. ඔහු 'නුඹලා වටලාගනු ලැබුවහොත් මිස නියතවශයෙන්ම නුඹලා ඔහුව ආපසු මා වෙත ගෙන එන බවට නුඹලා අල්ලාහ්ගේ නාමයෙන් ස්ථිර පොරොන්දුවක් මා හට දෙනතෙක් මම නුඹලා සමඟ ඔහුව නොඑවන්නෙමි.' යි කීවේය. තවද ඔවුන් තමන්ගේ ස්ථිර පොරොන්දුව ඔහුට දුන්විට 'අප කියන දේ පිළිබඳ අල්ලාහ් සුපරීක්ෂකයැ' යි ඔහු කීවේය.

وَقَالَ يَا بَنِيَّ لَا تَدْخُلُوا مِنْ بَابٍ وَاحِدٍ وَادْخُلُوا مِنْ أَبْوَابٍ مُتَفَرِّقَةٍ ۖ وَمَا أُغْنِي عَنْكُمْ مِنَ اللَّهِ مِنْ شَيْءٍ ۖ إِنِ الْحُكْمُ إِلَّا لِلَّهِ ۖ عَلَيْهِ تَوَكَّلْتُ ۖ وَعَلَيْهِ فَلْيَتَوَكَّلِ الْمُتَوَكِّلُونَ ﴿٦٨﴾

68. තවද ඔහු 'එම්බල මාගේ පුතුණුවනි! එකම දොරටුවකින් ඇතුළු නොවනු. නමුත් වෙන් වෙන්වූ දොරටුවලින් ඇතුළුවනු. අල්ලාහ්ට එරෙහිව නුඹලා වෙනුවෙන් කිසිම උපකාරයක් මට කළ නොහැකිය. තීරණය ඇත්තේ අල්ලාහ් වෙත පමණයි. ඔහු වෙතම මම විශ්වාසය තබන්නෙමි. තවද විශ්වාසය තබන්නන් සියළු දෙනාම ඔහු වෙතම විශ්වාසය තැබිය යුතුයැ'යි කීවේය.

وَلَمَّا دَخَلُوا مِنْ حَيْثُ أَمَرَهُمْ أَبُوهُمْ مَا كَانَ يُغْنِي عَنْهُمْ مِنَ اللَّهِ مِنْ شَيْءٍ إِلَّا حَاجَةً فِي نَفْسِ يَعْقُوبَ قَضَاهَا ۚ وَإِنَّهُ

69. තවද ඔවුන් තමන්ගේ පියාණන් අණකර ඇති පරිදි ඇතුළු වූ විට, අල්ලාහ්ට එරෙහිව ඔවුන් වෙනුවෙන් එයට (යූසුෆ්ගේ අදහසට) කිසිම උපකාරයක් කළ නොහැකි විය. එය හැරෙන්නට යඃකූබ්ගේ සිතෙහි බලවත් ආශාවක් තිබුණි, ඔහු එය ඉටු

لَذُو عِلْمٍ لِّمَا عَلَّمْنَٰهُ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَعْلَمُونَ ﴿٦٨﴾

කළේය. තවද අප ඔහුට උගන්වා ඇති නිසා ඔහු නියතවශයෙන්ම (මහත්) දැනුම් ඇත්තෙකු විය. එහෙත් බොහෝ මිනිසුන් නොදනිති.

وَلَمَّا دَخَلُوا عَلَىٰ يُوسُفَ آوَىٰ إِلَيْهِ أَخَاهُ قَالَ إِنِّي أَنَا أَخُوكَ فَلَا تَبْتَئِسْ بِمَا كَانُوا يَعْمَلُونَ ﴿٦٩﴾

70. තවද ඔවුන් යූසුෆ් ඉදිරියේ පැමිණි විට ඔහු තම සහෝදරයාව තමා ළඟ නවත්වා ගත්තේය. (තවද) ඔහු 'මම ඔබගේ සහෝදරයා වෙමි. එබැවින් ඔවුන් කරමින් සිටි දේ ගැන (දැන්) කණස්සල්ලට පත් නොවන්නැ'යි කීවේය.

فَلَمَّا جَهَّزَهُم بِجَهَازِهِمْ جَعَلَ السِّقَايَةَ فِي رَحْلِ أَخِيهِ ثُمَّ أَذَّنَ مُؤَذِّنٌ أَيَّتُهَا الْعِيرُ إِنَّكُمْ لَسَارِقُونَ ﴿٧٠﴾

71. තවද ඔහු ඔවුන්ගේ ජීවනෝපායෙන් ඔවුනට සපයා දුන් විට ඔහු තම සහෝදරයාගේ ගමන් මල්ලෙහි පානය කරන කෝප්පය දැමීය. එවිට හඬගසන්නෙක් 'එම්බල තවලම් පිරිසනි! නුඹලා සොරකමට වරදකරු වී ඇත්තෙහුයැ'යි හඬගැසීය.

قَالُوا وَأَقْبَلُوا عَلَيْهِم مَّاذَا تَفْقِدُونَ ﴿٧١﴾

72. ඔවුහු (යූසුෆ්ගේ සොහොයුරන්) ඔවුන් (රාජ සේවකයන්) දෙසට හැරෙමින් 'නුඹලා නැතිකර ඇත්තේ කුමක්දැ'?යි පැවසූහ.

قَالُوا نَفْقِدُ صُوَاعَ الْمَلِكِ وَلِمَن جَاءَ بِهِ حِمْلُ بَعِيرٍ وَأَنَا بِهِ زَعِيمٌ ﴿٧٢﴾

73. ඔවුහු 'අපි රජතුමාගේ මිණුම් බඳුන නැතිකර ඇත්තෙමු. තවද කවරෙක් එය රැගෙන එන්නේද ඔහුට ඔටුවකු තරම් ප්‍රමාණයක් ලැබෙනු ඇත. මම ඒ ගැන වගකියන්නා වෙමි'යි පිළිතුරු දුන්හ.

قَالُوا تَاللَّهِ لَقَدْ عَلِمْتُم مَّا جِئْنَا لِنُفْسِدَ فِي الْأَرْضِ وَمَا كُنَّا سَارِقِينَ ﴿٧٣﴾

74. ඔවුහු 'අල්ලාහ් මත දිවුරමින් පොළොවෙහි කලහකාරීව හැසිරීමට අපි නොපැමිණි බව නුඹලා මැනැවින් දන්නෙහුය. තවද අපි සොරුන් නොවෙමු.' යි පිළිතුරු දුන්හ.

قَالُوا فَمَا جَزَاؤُهُ إِن كُنتُمْ كَاذِبِينَ ﴿٧٤﴾

75. ඔවුහු 'නුඹලා බොරු කියන්නන් (බවට හෙළි) වුවහොත් ඒ වෙනුවෙන් දඬුවම විය යුත්තේ කුමක්දැ?'යි කීහ.

76. 'ඒ සඳහා දඬුවම, කිසිවෙකුගේ ගමන් මල්ලක එය සොයාගනු ලබන්නේද ඔහුටම ඒ සඳහා දඬය වනු ඇත. මේ ආකාරයට අපි වරුදකරුවන්ට දඬුවම් කරන්නෙමු'යි ඔවුහු පිළිතුරු දුන්හ.

قَالُوا جَزَاؤُهُ مَنْ وُجِدَ فِي رَحْلِهِ فَهُوَ جَزَاؤُهُ ۚ كَذَٰلِكَ نَجْزِي الظَّالِمِينَ ٧٦

77. ඉක්බිතිව ඔහු (භාණ්ඩගසන්නා) ඔහුගේ (යූසුෆ්ගේ) සහෝදරයාගේ බඩු මල්ලට පෙර ඔවුන්ගේ බඩු මලු (සෝදිසි කරන්නට) පටන් ගත්තේය. පසුව ඔහු එය ඔහුගේ (යූසුෆ්ගේ) සොහොයුරාගේ බඩු මල්ලෙන් එළියට ගත්තේය. මේ ආකාරයට අපි යූසුෆ් සඳහා සැලසුම් කළෙමු. අල්ලාහ් එලෙස අභිමත නොකළහොත් රජතුමාගේ නීතිය යටතේ ඔහුට සිය සහෝදරයාව නවත්වා ගැනීමට නොහැකිව තිබුණි. අප කැමති අයට අපි තරාතිරම් උසස් බවට පත් කරමු. තවද සියළු දැනුම් ඇති අයට ඉහළින් අතිශයින් දැනුමැත්තෙක් සිටින්නේය.

فَبَدَأَ بِأَوْعِيَتِهِمْ قَبْلَ وِعَاءِ أَخِيهِ ثُمَّ اسْتَخْرَجَهَا مِنْ وِعَاءِ أَخِيهِ ۚ كَذَٰلِكَ كِدْنَا لِيُوسُفَ ۖ مَا كَانَ لِيَأْخُذَ أَخَاهُ فِي دِينِ الْمَلِكِ إِلَّا أَنْ يَشَاءَ اللَّهُ ۚ نَرْفَعُ دَرَجَاتٍ مَنْ نَشَاءُ ۗ وَفَوْقَ كُلِّ ذِي عِلْمٍ عَلِيمٌ ٧٧

78. 'සොරකම් කර ඇත්තේ ඔහු නම්, ඔහුගේ සහෝදරයෙක්(ද) කලින් සොරකමේ යෙදුනේයැ'යි ඔවුහු කීහ. එහෙත් යූසුෆ් එය තම සිත්හි රහසිගතව තබා එය ඔවුනට හෙළි නොකළේය. 'නුඹලා නරකම තත්ත්වයෙහි සිටිනු පෙනේ. තවද නුඹලා දෝෂාරෝපණය කරන දේ අල්ලාහ් බෙහෙවින් දන්නේයැ'යි ඔහු (සිතින්) කීවේය.

قَالُوا إِنْ يَسْرِقْ فَقَدْ سَرَقَ أَخٌ لَهُ مِنْ قَبْلُ ۚ فَأَسَرَّهَا يُوسُفُ فِي نَفْسِهِ وَلَمْ يُبْدِهَا لَهُمْ ۚ قَالَ أَنْتُمْ شَرٌّ مَكَانًا ۖ وَاللَّهُ أَعْلَمُ بِمَا تَصِفُونَ ٧٨

79. 'එම්බල උතුමාණෙනි! ඔහුට ඉතා මහළු පියෙක් සිටියි. එබැවින් ඔහු වෙනුවට අපගෙන් කෙනෙකුව තබා ගන්න. ඇත්තෙන්ම අපි ඔබව යහපත් කරන්නවුන්ගෙන් දකිමු'යි ඔවුහු කීහ.

قَالُوا يَا أَيُّهَا الْعَزِيزُ إِنَّ لَهُ أَبًا شَيْخًا كَبِيرًا فَخُذْ أَحَدَنَا مَكَانَهُ ۖ إِنَّا نَرَاكَ مِنَ الْمُحْسِنِينَ ٧٩

80. 'අපගේ බඩු කවරෙකු ළඟ තිබී අප සොයාගත්තේද, ඔහු හැර (වෙනත්) අයෙකුව අප (සිරභාරයට)

قَالَ مَعَاذَ اللَّهِ أَنْ نَأْخُذَ إِلَّا مَنْ وَجَدْنَا

مَتَاعَنَا عِنْدَهٗٓ ۙ اِنَّآ اِذًا لَّظٰلِمُوْنَ ۝٨٠

ගැනීමෙන් අල්ලාහ් ආරක්ෂා කරත්වා. එවිට අපි නියතවශයෙන් අයුක්තිගරුක වන්නෙමු'යි ඔහු පිළිතුරු දුන්නේය.

فَلَمَّا اسْتَيْــَٔسُوْا مِنْهُ خَلَصُوْا نَجِيًّا ۭ قَالَ كَبِيْرُهُمْ اَلَمْ تَعْلَمُوْٓا اَنَّ اَبَاكُمْ قَدْ اَخَذَ عَلَيْكُمْ مَّوْثِقًا مِّنَ اللّٰهِ وَمِنْ قَبْلُ مَا فَرَّطْتُّمْ فِيْ يُوْسُفَ ۚ فَلَنْ اَبْرَحَ الْاَرْضَ حَتّٰى يَاْذَنَ لِيْٓ اَبِيْٓ اَوْ يَحْكُمَ اللّٰهُ لِيْ ۚ وَهُوَ خَيْرُ الْحٰكِمِيْنَ ۝٨١

81. තවද ඔහුගෙන් (යූසුෆ් ගෙන්) බලාපොරොත්තු සුන් වූ ඔවුන් පෞද්ගලික සාකච්ඡාවක් සඳහා ඉවත් වූහ. ඔවුන්ගේ (සොහොයුරන්ගෙන්) වැඩිමලා 'නුඹලාගේ පියා අල්ලාහ්ගේ නාමයෙන් නුඹලාගෙන් ස්ථිර පොරොන්දුවක් ලබාගත් බවත්, එමෙන්ම යූසුෆ්ට නුඹලා කළ අසාධාරණය සිහිකළ යුතු බවත්, නුඹලා නොදන්නෙහුද? එබැවින් මාගේ පියා මාහට අවසර දෙනතුරු හෝ මා වෙනුවෙන් අල්ලාහ් තීරණය කරන තුරු හෝ මම මෙම රට හැර නොයන්නෙමි. තවද ඔහු විනිශ්චය කරන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨයැ'යි කීවේය.

اِرْجِعُوْٓا اِلٰٓى اَبِيْكُمْ فَقُوْلُوْا يٰٓاَبَانَآ اِنَّ ابْنَكَ سَرَقَ ۚ وَمَا شَهِدْنَآ اِلَّا بِمَا عَلِمْنَا وَمَا كُنَّا لِلْغَيْبِ حٰفِظِيْنَ ۝٨٢

82. "නුඹලා තමන්ගේ පියා වෙත ආපසු යනු. තවද 'එම්බල අපගේ පියාණෙනි! ඔබගේ පුත්‍රයා සොරකම් කර ඇත. තවද අප දන්නා දේ පමණක් අපි ප්‍රකාශ කර ඇත්තෙමු. තවද අපට අදෘෂ්‍යමාන දේ කෙරෙහි ආරක්ෂා කරන්නන් විය නොහැකි යැ'යි පවසනු.

وَسْــَٔلِ الْقَرْيَةَ الَّتِيْ كُنَّا فِيْهَا وَالْعِيْرَ الَّتِيْٓ اَقْبَلْنَا فِيْهَا ۭ وَاِنَّا لَصٰدِقُوْنَ ۝٨٣

83. 'තවද අප සිටි නගරයේ (ජනතාවගෙන්)ද, අප පැමිණි තවලම් (පිරිස)ගෙන්ද විමසන්න. තවද නියතවශයෙන්ම අපි සත්‍ය පවසන්නෙමු.'"

قَالَ بَلْ سَوَّلَتْ لَكُمْ اَنْفُسُكُمْ اَمْرًا ۭ فَصَبْرٌ جَمِيْلٌ ۭ عَسَى اللّٰهُ اَنْ يَّاْتِيَنِيْ بِهِمْ جَمِيْعًا ۭ اِنَّهٗ هُوَ الْعَلِيْمُ الْحَكِيْمُ ۝٨٤

84. ඔහු(යඃකූබ්) 'නොඑසේය, එහෙත් නුඹලාගේ සිත් නුඹලාට මෙය යම් යහපතක් මෙන් පෙන්නුම් කරමින් නුඹලාව මුලා කර ඇත. එබැවින් (මා හැරෙන්නේ) උදාර ඉවසීම (වෙත)ය. අල්ලාහ්ට ඔවුන් සියල්ලවම මාවෙත ගෙන එන්නට පුළුවන. නියතවශයෙන්ම ඔහු සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නයැ'යි පිළිතුරු දුන්නේය.

85. තවද ඔහු ඔවුන් වෙතින් ඉවතට හැරී 'අහෝ! යූසුෆ් ගැන මාගේ ශෝකය යැ'යි කීවේය. තවද ශෝකය නිසා ඔහුගේ නෙත් කඳුලින් පිරුණි. තවද ඔහු (තම ශෝකය) යටපත් කරගත්තේය.

وَتَوَلَّىٰ عَنْهُمْ وَقَالَ يَٰٓأَسَفَىٰ عَلَىٰ يُوسُفَ وَٱبْيَضَّتْ عَيْنَاهُ مِنَ ٱلْحُزْنِ فَهُوَ كَظِيمٌ ﴿٨٥﴾

86. ඔවුහු 'අල්ලාහ් මත දිවුරමින් ඔබ (ශෝකයෙන්) ලෙඩ වන තුරු හෝ අභාවයට පත්වන තුරු හෝ යූසුෆ් ගැන කතා කිරීම ඔබ නොනවත්වන්නේයැ'යි කීහ.

قَالُوا۟ تَٱللَّهِ تَفْتَؤُا۟ تَذْكُرُ يُوسُفَ حَتَّىٰ تَكُونَ حَرَضًا أَوْ تَكُونَ مِنَ ٱلْهَٰلِكِينَ ﴿٨٦﴾

87. ඔහු 'මාගේ දුක සහ මාගේ ශෝකය ගැන අල්ලාහ් වෙත පමණක් මම පැමිණිලි කරමි. තවද නුඹලා නොදන්නා දේ මම අල්ලාහ්ගෙන් දැන ගනිමි'යි පිළිතුරු දුන්නේය.

قَالَ إِنَّمَآ أَشْكُوا۟ بَثِّى وَحُزْنِىٓ إِلَى ٱللَّهِ وَأَعْلَمُ مِنَ ٱللَّهِ مَا لَا تَعْلَمُونَ ﴿٨٧﴾

88. 'එම්බල මාගේ පුත්‍රයිනි! නුඹලා යනු. තවද යූසුෆ් හා ඔහුගේ සහෝදරයාව සොයනු. තවද අල්ලාහ්ගේ දයාව ගැන බලාපොරොත්තු සුන්කර නොගනු. නියතවශයෙන්ම අවිශ්වාසිත ජනතාව හැරෙන්නට අන් කිසිවෙක් අල්ලාහ්ගේ දයාව ගැන බලාපොරොත්තු සුන්කර නොගනියි'.

يَٰبَنِىَّ ٱذْهَبُوا۟ فَتَحَسَّسُوا۟ مِن يُوسُفَ وَأَخِيهِ وَلَا تَا۟يْـَٔسُوا۟ مِن رَّوْحِ ٱللَّهِ ۖ إِنَّهُۥ لَا يَا۟يْـَٔسُ مِن رَّوْحِ ٱللَّهِ إِلَّا ٱلْقَوْمُ ٱلْكَٰفِرُونَ ﴿٨٨﴾

89. තවද ඔවුන් ඔහු(යූසුෆ්) ඉදිරියට පැමිණි විට 'එම්බල උතුමාණනි! දිළිඳුකම අපවද අපගේ පවුලේ අයවද ග්‍රහණය කර ඇත. තවද අපි අල්ප මුදලක් ගෙනැවිත් ඇත්තෙමු. එබැවින් අපට සම්පූර්ණ මිනුම ලබා දෙන්න. තවද අප කෙරෙහි ත්‍යාගශීලී වන්න. නියතවශයෙන්ම අල්ලාහ් ත්‍යාගශීලීන්ට ප්‍රතිඵල දෙන්නේයැ'යි ඔවුහු කීහ.

فَلَمَّا دَخَلُوا۟ عَلَيْهِ قَالُوا۟ يَٰٓأَيُّهَا ٱلْعَزِيزُ مَسَّنَا وَأَهْلَنَا ٱلضُّرُّ وَجِئْنَا بِبِضَٰعَةٍ مُّزْجَىٰةٍ فَأَوْفِ لَنَا ٱلْكَيْلَ وَتَصَدَّقْ عَلَيْنَآ ۖ إِنَّ ٱللَّهَ يَجْزِى ٱلْمُتَصَدِّقِينَ ﴿٨٩﴾

90. 'නුඹලා අඥානයින්ව සිටියදී යූසුෆ්ටත් ඔහුගේ සහෝදරයාටත්

قَالَ هَلْ عَلِمْتُم مَّا فَعَلْتُم بِيُوسُفَ

وَاَخِيْهِ اِذْ اَنْتُمْ جٰهِلُوْنَ ﴿٩٠﴾

නුඹලා කුමක් කළේ දැයි නුඹලා දන්නෙහුදැ?' යි ඔහු කීවේය.

قَالُوْٓا ءَاِنَّكَ لَاَنْتَ يُوْسُفُ ؕ قَالَ اَنَا يُوْسُفُ وَهٰذَآ اَخِىْ ؗ قَدْ مَنَّ اللّٰهُ عَلَيْنَا ؕ اِنَّهٗ مَنْ يَّتَّقِ وَيَصْبِرْ فَاِنَّ اللّٰهَ لَا يُضِيْعُ اَجْرَ الْمُحْسِنِيْنَ ﴿٩١﴾

91. 'සැබැවින්ම ඔබද යූසුෆ්?' යැයි ඔවුහු කීහ. '(එසේය), මම යූසුෆ් වෙමි. තවද මොහු මාගේ සහෝදරයාය. සත්තකින්ම අල්ලාහ් අප (දෙදෙනා) කෙරෙහි කාරුණික වී ඇත. ඇත්තෙන්ම කවරෙක් හෝ ධාර්මිෂ්ඨ වේද ස්ථිරසාර වේද එවන් යහපත් ක්‍රියා කරන්නන්ගේ තිළිණය නිෂ්වල වීමට අල්ලාහ් ඉඩ නොතබන්නේයැ'යි ඔහු කීවේය.

قَالُوْا تَاللّٰهِ لَقَدْ اٰثَرَكَ اللّٰهُ عَلَيْنَا وَاِنْ كُنَّا لَخٰطِـِٕيْنَ ﴿٩٢﴾

92. ඔවුහු 'අල්ලාහ් මත දිවුරමින්, නියතවශයෙන්ම අල්ලාහ් අපට වඩා ඉහළින් ඔබට ප්‍රමුඛත්වය දී ඇත. තවද අප ඇත්තෙන්ම පව්කාරයින් වී ඇතැ'යි කීහ.

قَالَ لَا تَثْرِيْبَ عَلَيْكُمُ الْيَوْمَ ؕ يَغْفِرُ اللّٰهُ لَكُمْ ؗ وَهُوَ اَرْحَمُ الرّٰحِمِيْنَ ﴿٩٣﴾

93. ඔහු 'මෙදින නුඹලා කෙරෙහි කිසිඳු දොසක් (පවරන්නේ) නැත. අල්ලාහ් නුඹලාට සමාව දෙන්නේය. තවද ඔහු දයාව දක්වන්නන්ගෙන් පරම දයාබරයැ'යි කීවේය.

اِذْهَبُوْا بِقَمِيْصِىْ هٰذَا فَاَلْقُوْهُ عَلٰى وَجْهِ اَبِىْ يَاْتِ بَصِيْرًا ۚ وَاْتُوْنِىْ بِاَهْلِكُمْ اَجْمَعِيْنَ ﴿٩٤﴾

94. 'මාගේ මෙම කමිසය ගෙනයනු. තවද එය මාගේ පියාණන් ඉදිරියේ දමනු. (එවිට) ඔහු සැබෑ තත්ත්වය දැනගනු ඇත. තවද නුඹලාගේ පවුලේ සියලු දෙනාව මාවෙත ගෙන එනු.'

وَلَمَّا فَصَلَتِ الْعِيْرُ قَالَ اَبُوْهُمْ اِنِّىْ لَاَجِدُ رِيْحَ يُوْسُفَ لَوْلَآ اَنْ تُفَنِّدُوْنِ ﴿٩٥﴾

95. තවද තවලම පිටත්වූ විට ඔවුන්ගේ පියාණන් 'නුඹලා මාව උමතු වූවෙකු ලෙස සැලකුවද නියතවශයෙන්ම මා හට යූසුෆ්ගේ සුවඳ දැනේ' යැයි පැවසීය.

قَالُوْا تَاللّٰهِ اِنَّكَ لَفِىْ ضَلٰلِكَ الْقَدِيْمِ ﴿٩٦﴾

96. 'අල්ලාහ් මත දිවුරමින්, සහතික වශයෙන්ම ඔබගේ පැරණි වරදෙහිම ඔබ සිටින්නෙහියැ'යි ඔවුහු කීහ.

فَلَمَّآ اَنْ جَآءَ الْبَشِيْرُ اَلْقٰىهُ عَلٰى وَجْهِهٖ فَارْتَدَّ بَصِيْرًا ۚ قَالَ اَلَمْ اَقُلْ لَّكُمْ ۚ اِنِّىْٓ اَعْلَمُ مِنَ اللّٰهِ مَا لَا تَعْلَمُوْنَ ﴿٩٧﴾

97. තවද ශුභාරංචි ගෙනෙන්නා පැමිණ ඔහු එය (කමිසය) ඔහුගේ (යඃකුබ්) ඉදිරියේ දැම්මේය. තවද ඔහුට (සැබෑ තත්ත්වය) අවබෝධ වන්නට විය. (එවිට) ඔහු "'නුඹලා නොදන්නා දේ මා අල්ලාහ්ගෙන් දැනගන්නේ යැ'යි මා නුඹලාට නොකිවෙම් දැ"යි කිවේය.

قَالُوْا يٰٓاَبَانَا اسْتَغْفِرْ لَنَا ذُنُوْبَنَآ اِنَّا كُنَّا خٰطِـِٕيْنَ ﴿٩٨﴾

98. ඔවුහු 'එම්බල අපගේ පියාණෙනි! අප වෙනුවෙන් අපගේ පව් ක්‍ෂමා වීමට අයැදින්න. ඇත්තෙන්ම අපි පව්කාරයින් වී ඇත්තෙමු'යි කීහ.

قَالَ سَوْفَ اَسْتَغْفِرُ لَكُمْ رَبِّيْ ؕ اِنَّهٗ هُوَ الْغَفُوْرُ الرَّحِيْمُ ﴿٩٩﴾

99. 'නියතවශයෙන්ම මම නුඹලා වෙනුවෙන් මාගේ අධිපතියාණන්ගෙන් ක්‍ෂමාව අයැදින්නෙමි. ඇත්තෙන්ම ඔහු අතිශයින්ම ක්‍ෂමාන්විතය, පරම දයාබරයැ'යි ඔහු කිවේය.

فَلَمَّا دَخَلُوْا عَلٰى يُوْسُفَ اٰوٰٓى اِلَيْهِ اَبَوَيْهِ وَقَالَ ادْخُلُوْا مِصْرَ اِنْ شَآءَ اللّٰهُ اٰمِنِيْنَ ؕ﴿١٠٠﴾

100. තවද ඔවුන් යූසුෆ් වෙත පැමිණි විට ඔහු තම දෙමාපියන්ව තමා සමග නවත්වාගත්තේය. තවද 'අල්ලාහ් අභිමත නම් සාමයෙන් ඊජිප්තුවට පිවිසෙනු'යි කීවේය.

وَرَفَعَ اَبَوَيْهِ عَلَى الْعَرْشِ وَخَرُّوْا لَهٗ سُجَّدًا ۚ وَقَالَ يٰٓاَبَتِ هٰذَا تَاْوِيْلُ رُءْيَايَ مِنْ قَبْلُ ۫ قَدْ جَعَلَهَا رَبِّيْ حَقًّا ؕ وَقَدْ اَحْسَنَ بِيْٓ اِذْ اَخْرَجَنِيْ مِنَ السِّجْنِ وَجَآءَ بِكُمْ مِّنَ الْبَدْوِ مِنْۢ بَعْدِ اَنْ نَّزَغَ الشَّيْطٰنُ بَيْنِيْ وَبَيْنَ اِخْوَتِيْ ؕ اِنَّ رَبِّيْ

101. තවද ඔහු තම දෙමාපියන්ව සිංහාසනය මත ගෞරවාන්විතව අසුන් ගැන්විය. තවද ඔවුහු (සියලු දෙනාම) ඔහු වෙනුවෙන් (අල්ලාහ් ඉදිරියෙහි) දණින් වැටී නමස්කාරය කළහ. තවද ඔහු 'එම්බල මාගේ පියාණනි! මෙය (මාදුටු) මාගේ පැරණි සිහිනයක අර්ථකථනයයි. මාගේ අධිපතියාණන් එය සැබෑකර ඇත්තේය. ඔහු මාව සිරගෙයින් එළියට ගත් කල්හිද ෂෙයිතාන් මා හා මගේ සහෝදරයින් අතර භේදභින්න වීමට පොළඹවීමෙන් පසුවද නුඹලාව කාන්තාරයෙන් ගෙන

لَطِيفٌ لِّمَا يَشَآءُ ۚ إِنَّهُۥ هُوَ ٱلْعَلِيمُ ٱلْحَكِيمُ ﴿١٠١﴾

ආ කල්හිද ඔහු මා කෙරෙහි බෙහෙවින් අනුග්‍රහය දැක්වූවේය. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන්, ඔහු අභිමත කරන අය හට අතිශයින්ම සෞම්‍යවන්තය. ඇත්තෙන්ම ඔහු සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නයැ'යි කීවේය.

رَبِّ قَدْ ءَاتَيْتَنِى مِنَ ٱلْمُلْكِ وَعَلَّمْتَنِى مِن تَأْوِيلِ ٱلْأَحَادِيثِ ۚ فَاطِرَ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ أَنتَ وَلِىِّۦ فِى ٱلدُّنْيَا وَٱلْءَاخِرَةِ ۖ تَوَفَّنِى مُسْلِمًا وَأَلْحِقْنِى بِٱلصَّٰلِحِينَ ﴿١٠٢﴾

102. 'මාගේ අධිපතියාණෙනි! ඔබ මා හට රාජ්‍යය දායකත්වය මගින් ආශිර්වාද කර ඇත්තේය. තවද මා හට සිද්ධීන්හි අර්ථකථනය උගන්වා ඇත්තේය. අහස් සහ පොළොවේ මැවුම්කරුවාණෙනි! ඔබ මෙලොව හා පරලොවෙහි මාගේ ආරක්ෂකයාය. (ඔබගේ අභිමතයට) අවනත වීමේ තත්ත්වයෙහි මා හට මරණය දෙනු මැනව. තවද මා ව ධාර්මිෂ්ඨකයින්ගෙන් එක් කරනු මැනව.'

ذَٰلِكَ مِنْ أَنۢبَآءِ ٱلْغَيْبِ نُوحِيهِ إِلَيْكَ ۖ وَمَا كُنتَ لَدَيْهِمْ إِذْ أَجْمَعُوٓا۟ أَمْرَهُمْ وَهُمْ يَمْكُرُونَ ﴿١٠٣﴾

103. මෙය අදෘශ්‍යමාන දැයෙහි ආරංචියන්ගෙන් වේ. එය අපි ඔබ වෙත අනාවරණය කරන්නෙමු. තවද ඔවුන් කුමන්ත්‍රණය කරමින් සිටිය අතර ඔවුන්ගේ සැලසුම මත ඔවුන් එකඟ වූ විට ඔබ ඔවුන් සමග සිටියේ නැත.

وَمَآ أَكْثَرُ ٱلنَّاسِ وَلَوْ حَرَصْتَ بِمُؤْمِنِينَ ﴿١٠٤﴾

104. තවද ඔබ කෙතරම් (එයට) ඕනෑකමින් ආශා කළද බොහෝ මිනිසුන් විශ්වාස නොකරන්නෝය.

وَمَا تَسْـَٔلُهُمْ عَلَيْهِ مِنْ أَجْرٍ ۚ إِنْ هُوَ إِلَّا ذِكْرٌ لِّلْعَٰلَمِينَ ﴿١٠٥﴾

105. තවද ඒ සඳහා ඔබ ඔවුන්ගෙන් කිසිඳු ප්‍රතිලාභයක් නොඉල්ලන්නෙහිය. මෙය සියළු මනුෂ්‍ය වර්ගයාට දැනමුතුකමක් පමණය.

وَكَأَيِّن مِّنْ ءَايَةٍ فِى ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ يَمُرُّونَ عَلَيْهَا وَهُمْ عَنْهَا مُعْرِضُونَ ﴿١٠٦﴾

106. තවද අහස් සහ පොළොවෙහි කොපමණ සලකුණු තිබේද? ඔවුන් ඒවායින් ඉවත හැරෙමින් පසු කර යති .

وَمَا يُؤْمِنُ أَكْثَرُهُم بِٱللَّهِ إِلَّا وَهُم مُّشْرِكُونَ ﴿١٠٧﴾

107. තවද බොහෝ අය අල්ලාහ් කෙරෙහි විශ්වාස නොකරති. එහෙත් ඔවුන් (ඔහුට) සමාන තබන්නෝය.

108. අල්ලාහ් වෙතින් හසු කරන්නාවූ දඬුවම ඔවුන් වෙත පැමිණීමෙන් හෝ ඔවුන් නොදැනුවත්ව සිටියදී එම හෝරාව ඔවුන් වෙත ක්ෂණිකව පැමිණීමෙන් හෝ ඔවුන් සුරක්ෂිත යැයි ඔවුනට දැනෙන්නේද?

أَفَأَمِنُوٓا۟ أَن تَأْتِيَهُمْ غَٰشِيَةٌ مِّنْ عَذَابِ ٱللَّهِ أَوْ تَأْتِيَهُمُ ٱلسَّاعَةُ بَغْتَةً وَهُمْ لَا يَشْعُرُونَ ١٠٨

109. 'මෙය මාගේ මාර්ගය වේ. මම අල්ලාහ් වෙතට කැඳවමි. මම පැහැදිලි දැනුමැති තත්ත්වයක නිරතව සිටිමි. මාව අනුගමනය කරන අයද එසේමය. තවද අල්ලාහ් සුවිශුද්ධය. තවද මම (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් නොවෙමි'යි පවසන්න.

قُلْ هَٰذِهِۦ سَبِيلِىٓ أَدْعُوٓا۟ إِلَى ٱللَّهِ ۚ عَلَىٰ بَصِيرَةٍ أَنَا۠ وَمَنِ ٱتَّبَعَنِى ۖ وَسُبْحَٰنَ ٱللَّهِ وَمَآ أَنَا۠ مِنَ ٱلْمُشْرِكِينَ ١٠٩

110. තවද නගරවාසීන් අතුරින් අප අනාවරණය කළ පුරුෂයින් වෙත මිස අන් කිසිවෙකුව අපි ඔබට පෙර (දූතයින් ලෙස) නොඑව්වෙමු. ඔවුහු පොළොවෙහි සංචාරය නොකළෙහුද? එසේනම් ඔවුන්ට පෙර සිටියවුන්ගේ අවසානය කෙසේ විදැයි ඔවුන්ට දැක ගන්නට තිබුනි. තවද නියතවශයෙන්ම දෙවියන් කෙරෙහි බියවන්නන් හට පරලොවේ වාසය වඩාත් යහපත් වේ. එබැවින් නුඹලා තේරුම් නොගන්නෙහුද?

وَمَآ أَرْسَلْنَا مِن قَبْلِكَ إِلَّا رِجَالًا نُّوحِىٓ إِلَيْهِم مِّنْ أَهْلِ ٱلْقُرَىٰٓ ۗ أَفَلَمْ يَسِيرُوا۟ فِى ٱلْأَرْضِ فَيَنظُرُوا۟ كَيْفَ كَانَ عَٰقِبَةُ ٱلَّذِينَ مِن قَبْلِهِمْ ۗ وَلَدَارُ ٱلْءَاخِرَةِ خَيْرٌ لِّلَّذِينَ ٱتَّقَوْا۟ ۗ أَفَلَا تَعْقِلُونَ ١١٠

111. යම්තාක්දයත් දූතයන් බලාපොරොත්තු සුන්වී තමන් බොරුකාරයින් ලෙස සළකනු ලැබූ බව සිතූ විට, ක්ෂණිකව අපගේ උපකාරය පැමිණියේය. තවද අප අභිමත වූ අය මුදවා ගනු ලැබීය. තවද පව්කාර ජනතාවගෙන් අපගේ දඬුවම ඉවත් කරවීමට නොහැක.

حَتَّىٰٓ إِذَا ٱسْتَيْـَٔسَ ٱلرُّسُلُ وَظَنُّوٓا۟ أَنَّهُمْ قَدْ كُذِبُوا۟ جَآءَهُمْ نَصْرُنَا فَنُجِّىَ مَن نَّشَآءُ ۖ وَلَا يُرَدُّ بَأْسُنَا عَنِ ٱلْقَوْمِ ٱلْمُجْرِمِينَ ١١١

112. සහතිකවම ඔවුන්ගේ වෘතාන්තයෙහි වටහාගන්නා මිනිසුනට පාඩමක් ඇත. මෙය

لَقَدْ كَانَ فِى قَصَصِهِمْ عِبْرَةٌ لِّأُو۟لِى ٱلْأَلْبَٰبِ ۗ مَا كَانَ حَدِيثًا يُفْتَرَىٰ وَلَٰكِن

تَصۡدِيقَ ٱلَّذِي بَيۡنَ يَدَيۡهِ وَتَفۡصِيلَ كُلِّ شَيۡءٖ وَهُدٗى وَرَحۡمَةٗ لِّقَوۡمٖ يُؤۡمِنُونَ ١١١

ගොතන ලද්දක් නොවේ. නමුත් (මෙය) එයට ඉදිරියේ ඇති දෙය සම්පූර්ණ කිරීමක් මෙන්ම සියළු දේ පිළිබඳව විස්තර විවරණයක්ද වේ. එමෙන්ම මෙය විශ්වාසිත ජනතාවට මගපෙන්වීමක් මෙන්ම දයාවක්ද වේ.




අල් ර'අද්

(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

2. අලිෆ්, ලාම්, මීම්, රා◆. මේවා (පරිපූර්ණ) ග්‍රන්ථයේ වාක්‍යයන් වේ. තවද ඔබ අධිපතියාණන්ගෙන් ඔබ වෙත පහළ කරනු ලැබූ මෙය සත්‍යය වේ. එහෙත් බොහෝ මිනිසුන් විශ්වාස නොකරති.

الٓمّٓرٰ ۚ تِلْكَ اٰيٰتُ الْكِتٰبِ ؕ وَالَّذِيْٓ اُنْزِلَ اِلَيْكَ مِنْ رَّبِّكَ الْحَقُّ وَلٰكِنَّ اَكْثَرَ النَّاسِ لَا يُؤْمِنُوْنَ ②

3. නුඹලා දකින පරිදි කුළුණු කිසිවක් නොමැතිව අහස් ඉහලට එසවූයේ අල්ලාහ් වන ඔහුය. අනතුරුව ඔහු තමාව සිංහාසනය මත ස්ථාවර කර ගත්තේය. තවද ඔහු ඉර සහ සඳ සේවය සඳහා නියම කළේය. මේ හැම එකක්ම නියමිත කාලයක් තෙක් සිය (පථයේ) ක්‍රියාත්මක වේ. ඔහු ඒ සියල්ල හසුරුවන්නේය. නුඹලාගේ අධිපතියාණන්ගේ හමුව පිළිබඳව නුඹලා දැඩි විශ්වාසයක් ඇති කරනු පිණිස ඔහු පැහැදිලි ලෙස සලකුණු විස්තර කරයි.

اَللّٰهُ الَّذِيْ رَفَعَ السَّمٰوٰتِ بِغَيْرِ عَمَدٍ تَرَوْنَهَا ثُمَّ اسْتَوٰى عَلَى الْعَرْشِ وَسَخَّرَ الشَّمْسَ وَالْقَمَرَ ؕ كُلٌّ يَّجْرِيْ لِاَجَلٍ مُّسَمًّى ؕ يُدَبِّرُ الْاَمْرَ يُفَصِّلُ الْاٰيٰتِ لَعَلَّكُمْ بِلِقَآءِ رَبِّكُمْ تُوْقِنُوْنَ ③

4. තවද පොළොව විහිදුවා එහි කඳු සහ ගංගා ඇති කළේ ඔහුමය. තවද ඔහු සියළු වර්ගයේ පළතුරු ඒවා ජෝඩු දෙක බැගින් ඇති කළේය. තවද ඔහු දහවල රාත්‍රියෙන් ආවරණය කරන්නේය. මෙනෙහි කරන ජනතාවට සැබැවින්ම එහි සලකුණු ඇත.

وَهُوَ الَّذِيْ مَدَّ الْاَرْضَ وَجَعَلَ فِيْهَا رَوَاسِيَ وَاَنْهٰرًا ؕ وَمِنْ كُلِّ الثَّمَرٰتِ جَعَلَ فِيْهَا زَوْجَيْنِ اثْنَيْنِ يُغْشِي الَّيْلَ النَّهَارَ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّقَوْمٍ يَّتَفَكَّرُوْنَ ④

5. තවද පොළොවෙහි

وَفِي الْاَرْضِ قِطَعٌ مُّتَجٰوِرٰتٌ وَّجَنّٰتٌ

◆ සියල්ල දත්තාවූද, සියල්ල දකින්නාවූද මම අල්ලාහ් වෙමි.

එකිනෙකට යා වූ (විවිධ) යායවල් මෙන්ම එක මූලයකින් වැඩෙන එමෙන්ම එසේ නොවැඩෙන (අනෙක්) මිදි වතුද ධාන්‍යයන් සහිත කෙත්ද රටඉඳි ගස්ද ඇත. ඒවාට දිය සපයනු ලබන්නේ එකම ජලයෙනි. එසේවුවද අපි ඵලය අනුව සමහරක් අනෙකට වඩා විශිෂ්ටත්වයට පත්කරන්නෙමු. වටහාගන්නා ජනතාවට එහි සලකුණු ඇත.

مِّنْ أَعْنَابٍ وَزَرْعٌ وَنَخِيلٌ صِنْوَانٌ وَغَيْرُ صِنْوَانٍ يُسْقَىٰ بِمَاءٍ وَاحِدٍ وَنُفَضِّلُ بَعْضَهَا عَلَىٰ بَعْضٍ فِي الْأُكُلِ ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّقَوْمٍ يَعْقِلُونَ ۝٥

6. තවද ඔබ පුදුම වන්නේ නම් 'කිමද! අප පස් දූවිලි බවට පත්ව පසුව අපි නව මැවීමක (තත්ත්වය)ට පත් වන්නෙමුද?' යන ඔවුන්ගේ කියමන ඇත්තෙන්ම පුදුම සහගත වේ. සිය අධිපතියාණන් කෙරෙහි අවිශ්වාසිත වන්නෝ මොවුහුය. තවද තමන්ගේ ගෙලවටා විලංගු දමනු ලබන්නෝද මොවුහුය. තවද ගින්නෙහි සහකරුවෝ මොවුහුය. තවද මොවුහු එහිම වෙසෙන්නෝය.

وَإِن تَعْجَبْ فَعَجَبٌ قَوْلُهُمْ أَإِذَا كُنَّا تُرَابًا أَإِنَّا لَفِي خَلْقٍ جَدِيدٍ ۗ أُولَٰئِكَ الَّذِينَ كَفَرُوا بِرَبِّهِمْ ۖ وَأُولَٰئِكَ الْأَغْلَالُ فِي أَعْنَاقِهِمْ ۖ وَأُولَٰئِكَ أَصْحَابُ النَّارِ ۖ هُمْ فِيهَا خَالِدُونَ ۝٦

7. තවද යහපතට වඩා ඔබ ඔවුන් කෙරෙහි අයහපත ගෙන ඒම ගැන ඔවුන් ඔබගෙන් ඉතා ඕනෑකමින් ඉල්ලා සිටිති. කෙසේවුවද පාඩම් සහිත දඬුවම් (දැනටමත්) ඔවුනට පෙර සිදුවී ඇත. තවද සැබැවින්ම ඔබගේ අධිපතියාණන් මිනිස් වර්ගයා වෙනුවෙන් ඔවුන්ගේ වැරැද්ද තිබියදීත් අතිශයින්ම සමාව දෙන්නාය. තවද සැබැවින්ම ඔබගේ අධිපතියාණන් දඬුවම් දීමෙහි(ද) දැඩිය.

وَيَسْتَعْجِلُونَكَ بِالسَّيِّئَةِ قَبْلَ الْحَسَنَةِ وَقَدْ خَلَتْ مِن قَبْلِهِمُ الْمَثُلَاتُ ۗ وَإِنَّ رَبَّكَ لَذُو مَغْفِرَةٍ لِّلنَّاسِ عَلَىٰ ظُلْمِهِمْ ۖ وَإِنَّ رَبَّكَ لَشَدِيدُ الْعِقَابِ ۝٧

8. 'තවද ඔහුගේ අධිපතියාණන් වෙතින් ඔහු වෙත සලකුණක් පහළකර නැත්තේ මක්නිසාදැ?' යි අවිශ්වාසිත අය පවසති. ඔබ නියතවශයෙන්ම අවවාද කරන්නෙක්ය. තවද සෑම ජනතාවක් වෙනුවෙන්ම මග පෙන්වන්නෙක් ඇත.

وَيَقُولُ الَّذِينَ كَفَرُوا لَوْلَا أُنزِلَ عَلَيْهِ آيَةٌ مِّن رَّبِّهِ ۗ إِنَّمَا أَنتَ مُنذِرٌ ۖ وَلِكُلِّ قَوْمٍ هَادٍ ۝٨

9. සෑම ස්ත්‍රියක්ම උසුලන්නේ

اللَّهُ يَعْلَمُ مَا تَحْمِلُ كُلُّ أُنثَىٰ وَمَا تَغِيضُ

الْأَرْحَامُ وَمَا تَزْدَادُ ۖ وَكُلُّ شَيْءٍ عِنْدَهُ بِمِقْدَارٍ ﴿٩﴾

කුමක්ද යන්නත් ගර්භාෂයන් අඩුකරන්නේ කුමක්ද යන්නත් ඒවා වර්ධනය කරන්නේ කුමක්ද යන්නත් අල්ලාහ් දනී. තවද සෑම දෙයක් ඔහු වෙත (සුදුසු) මිනුමකින් ඇත.

عَالِمُ الْغَيْبِ وَالشَّهَادَةِ الْكَبِيرُ الْمُتَعَالِ ﴿١٠﴾

10. අදෘෂ්‍යමාන දේද දෘෂ්‍යමාන දේද දත්තා (ඔහු)ය. සමකළ නොහැකි ශ්‍රේෂ්ඨයාය, අති උතුම්ය.

سَوَاءٌ مِنْكُمْ مَنْ أَسَرَّ الْقَوْلَ وَمَنْ جَهَرَ بِهِ وَمَنْ هُوَ مُسْتَخْفٍ بِاللَّيْلِ وَسَارِبٌ بِالنَّهَارِ ﴿١١﴾

11. නුඹලා අතුරින් තම වචනය සඟවන අයද එය විවෘතව ප්‍රකාශ කරන අයද (ඔහුගේ දැක්මෙහි) සමානය. තවද රාත්‍රියේදී සැඟවී සිටින අයද දහවලෙහි (එළිපිට) සක්මන් කරන අය(ද සමාන) වේ.

لَهُ مُعَقِّبَاتٌ مِنْ بَيْنِ يَدَيْهِ وَمِنْ خَلْفِهِ يَحْفَظُونَهُ مِنْ أَمْرِ اللَّهِ ۗ إِنَّ اللَّهَ لَا يُغَيِّرُ مَا بِقَوْمٍ حَتَّىٰ يُغَيِّرُوا مَا بِأَنْفُسِهِمْ ۗ وَإِذَا أَرَادَ اللَّهُ بِقَوْمٍ سُوءًا فَلَا مَرَدَّ لَهُ ۚ وَمَا لَهُمْ مِنْ دُونِهِ مِنْ وَالٍ ﴿١٢﴾

12. ඔහුට (දූතයාට) ඔහුගේ ඉදිරිපසින්ද ඔහුගේ පිටුපසින්ද (සුරදූතයින්) අනුපිළිවෙලින් ඇත. ඔවුහු අල්ලාහ්ගේ විධානයෙන් ඔහුව ආරක්ෂා කරති. නියතවශයෙන්ම අල්ලාහ් ජනතාවකගේ තත්ත්වය, ඔවුන් සිය හදවත්හි ඇති දේ වෙනස් කර ගන්නා තුරු වෙනස් නොකරන්නේය. තවද අල්ලාහ් ජනතාවකට දඬුවම් පමුණුවන්නට අදිටන් කරන විට එය වැළැක්වීමට කිසිවෙක් නැත. තවද ඔහු හැර කිසිඳු උදව්කරුවෙකු ඔවුනට නොමැත.

هُوَ الَّذِي يُرِيكُمُ الْبَرْقَ خَوْفًا وَطَمَعًا وَيُنْشِئُ السَّحَابَ الثِّقَالَ ﴿١٣﴾

13. බියත් අපේක්ෂාවත් (සිත් තුලට කාවැද්දීම සඳහා) විදුලි කෙටීම නුඹලාට පෙන්වන්නේ ඔහුමය. තවද ඔහු (දියෙන්)බර වලාකුළුද ඔසවන්නේය.

وَيُسَبِّحُ الرَّعْدُ بِحَمْدِهِ وَالْمَلَائِكَةُ مِنْ خِيفَتِهِ وَيُرْسِلُ الصَّوَاعِقَ فَيُصِيبُ بِهَا مَنْ يَشَاءُ وَهُمْ يُجَادِلُونَ فِي اللَّهِ وَهُوَ شَدِيدُ الْمِحَالِ ﴿١٤﴾

14. තවද ගිගුරුම ඔහුගේ ප්‍රශංසාව සමග ඔහුව සුවිශුද්ධ කරන්නේය. තවද සුරදූතයෝද ඔහුට ඇති බිය නිසා (එලෙසම කරති). තවද ඔහු අකුණු සැර එවමින් ඔහු අභිමත කරන අයව එමගින් හසුකරයි. එසේ වුවද ඔවුහු අල්ලාහ් සම්බන්ධව වාද කරති. තවද ඔහු දඬුවම් දීමෙහි දැඩිය.

15. සැබෑ අයැදීම යොමුකරනු ලබන්නේ ඔහු වෙත පමණි. තවද ඔහු හැර ඔවුන් කැඳවන (වෙනත්) අය ඔවුනට කිසිම පිළිතුරක් නොදෙන්නෝය. එය යමෙකු තම මුඛයට දිය ළංවිය යුතු යැයි තමාගේ දෑත් දිගුකරන්නකු සේය. එහෙත් එය ඒ දෙසට ළං නොවන්නේමය. තවද අවිශ්වාසිතයින්ගේ යැදීම නිෂ්ඵල වූ දෙයක් මිස නැත.

لَهُۥ دَعْوَةُ ٱلْحَقِّ ۖ وَٱلَّذِينَ يَدْعُونَ مِن دُونِهِۦ لَا يَسْتَجِيبُونَ لَهُم بِشَىْءٍ إِلَّا كَبَـٰسِطِ كَفَّيْهِ إِلَى ٱلْمَآءِ لِيَبْلُغَ فَاهُ وَمَا هُوَ بِبَـٰلِغِهِۦ ۚ وَمَا دُعَآءُ ٱلْكَـٰفِرِينَ إِلَّا فِى ضَلَـٰلٍ ﴿١٥﴾

16. තවද අහස්හි මෙන්ම පොළොවෙහි ඇති කුමක් හෝ වේවා කැමැත්තෙන් හෝ අකමැත්තෙන් අල්ලාහ්ට අවනත වේ. තවද ඒවායේ සෙවණැලිද උදය සහ සවස් කාලයන්හි (එලෙසම කරයි).

وَلِلَّهِ يَسْجُدُ مَن فِى ٱلسَّمَـٰوَٰتِ وَٱلْأَرْضِ طَوْعًا وَكَرْهًا وَظِلَـٰلُهُم بِٱلْغُدُوِّ وَٱلْـَٔاصَالِ ۩ ﴿١٦﴾ السجدة

17. 'අහස් සහ පොළොවේ අධිපතියාණන් කවුරුන්දැ?'යි අසන්න. 'අල්ලාහ් යැ'යි පවසන්න. 'ඔහු හැර, තමන්ට පවා යහපතක් හෝ හානියක් කරගත නොහැකි වෙනත් අයව නුඹලා උදව්කරුවන් වශයෙන් ගෙන තිබේදැ?'යි පවසන්න. 'අන්ධයා සහ පෙනුම ඇත්තා එක සමාන විය හැකිද? එසේ නැත්නම් අන්ධකාරය ආලෝකයට සමාන විය හැකිද? එසේත් නැත්නම් ඔහුගේ මැවීමට සමානව ඔවුන් මවා ඇති දේ, මැවීම් (දෙකක් ලෙස) එක හා සමානව ඔවුන්ට පෙනෙන බැවින් ඔවුන් අල්ලාහ්ට සමාන තබන්නෙහුදැ?'යි අසන්න. 'සියලු දෙයෙහි මැවුම්කරුවාණන් අල්ලාහ් පමණය. තවද ඔහු එකම පරම මහෝත්තමයා යැ'යි පවසන්න.

قُلْ مَن رَّبُّ ٱلسَّمَـٰوَٰتِ وَٱلْأَرْضِ قُلِ ٱللَّهُ ۚ قُلْ أَفَٱتَّخَذْتُم مِّن دُونِهِۦٓ أَوْلِيَآءَ لَا يَمْلِكُونَ لِأَنفُسِهِمْ نَفْعًا وَلَا ضَرًّا ۚ قُلْ هَلْ يَسْتَوِى ٱلْأَعْمَىٰ وَٱلْبَصِيرُ أَمْ هَلْ تَسْتَوِى ٱلظُّلُمَـٰتُ وَٱلنُّورُ ۗ أَمْ جَعَلُوا۟ لِلَّهِ شُرَكَآءَ خَلَقُوا۟ كَخَلْقِهِۦ فَتَشَـٰبَهَ ٱلْخَلْقُ عَلَيْهِمْ ۚ قُلِ ٱللَّهُ خَـٰلِقُ كُلِّ شَىْءٍ وَهُوَ ٱلْوَٰحِدُ ٱلْقَهَّـٰرُ ﴿١٧﴾

18. ඔහු අහසින් ජලය පහළ කරයි. එවිට නිම්නයන් ඒවායෙහි ප්‍රමාණයට ගලා බසී. තවද ජල ගැල්ම නගින පෙන (මතුපිටට) ගෙන ආවේය. ආභරණ සහ ගේදොර

أَنزَلَ مِنَ ٱلسَّمَآءِ مَآءً فَسَالَتْ أَوْدِيَةٌۢ بِقَدَرِهَا فَٱحْتَمَلَ ٱلسَّيْلُ زَبَدًا رَّابِيًا ۚ وَمِمَّا

يُوقِدُونَ عَلَيْهِ فِي النَّارِ ابْتِغَاءَ حِلْيَةٍ أَوْ مَتَاعٍ زَبَدٌ مِّثْلُهُ ۚ كَذَٰلِكَ يَضْرِبُ اللَّهُ الْحَقَّ وَالْبَاطِلَ ۚ فَأَمَّا الزَّبَدُ فَيَذْهَبُ جُفَاءً ۖ وَأَمَّا مَا يَنفَعُ النَّاسَ فَيَمْكُثُ فِي الْأَرْضِ ۚ كَذَٰلِكَ يَضْرِبُ اللَّهُ الْأَمْثَالَ ﴿١٨﴾

උපකරණ (සෑදීම සඳහා) ඔවුන් ගින්නෙහි රත් කරන දෙයින්ද ඒ හා සමානව පෙන (පිටවෙයි). මෙලෙස අල්ලාහ් සත්‍ය සහ අසත්‍ය පහදා දෙන්නේය. එහෙයින් පෙන ගත් කළ, ඒවා අනවශ්‍ය ලෙස ඉවත්ව යයි. එහෙත් මිනිසාට ප්‍රයෝජනවත් වන දේ පොළොව මත රඳා පවතී. අල්ලාහ් මෙලෙස උදාහරණයන් ගෙනහැර දක්වන්නේය.

لِلَّذِينَ اسْتَجَابُوا لِرَبِّهِمُ الْحُسْنَىٰ ۚ وَالَّذِينَ لَمْ يَسْتَجِيبُوا لَهُ لَوْ أَنَّ لَهُم مَّا فِي الْأَرْضِ جَمِيعًا وَمِثْلَهُ مَعَهُ لَافْتَدَوْا بِهِ ۚ أُولَٰئِكَ لَهُمْ سُوءُ الْحِسَابِ وَمَأْوَاهُمْ جَهَنَّمُ ۖ وَبِئْسَ الْمِهَادُ ﴿١٩﴾

19. සිය අධිපතියාණන්ට ප්‍රතිචාරය දක්වන අයහට (සදාකාලික) යහපත වේ. තවද ඔහුට ප්‍රතිචාරය නොදක්වන අය ගත් කළ, පොළොවෙහි ඇති සියළු දේද ඒ සමග එවැන්නක් මෙන්ම තවත් දේද තමන් සතුව තිබුණි නම් ඔවුන් ඒවා (පහසුවෙන්) තමන්ව (දඬුවමින් ගලවා ගනු පිණිස) වන්දි වශයෙන් ගෙවනු ඇත. නපුරු ගණන් ගැනීම ලැබෙනුයේ ඔවුන්ටමය. තවද ඔවුන්ගේ වාසස්ථානය නිරය වේ. එය කෙතරම් නපුරුතම වාසස්ථානයක්ද!

أَفَمَن يَعْلَمُ أَنَّمَا أُنزِلَ إِلَيْكَ مِن رَّبِّكَ الْحَقُّ كَمَنْ هُوَ أَعْمَىٰ ۚ إِنَّمَا يَتَذَكَّرُ أُولُو الْأَلْبَابِ ﴿٢٠﴾

20.එහෙයින් ඔබ අධිපතියාණන්ගෙන් ඔබ වෙත පහළ කරන ලද දේ සත්‍යය බව දත් තැනැත්තා අන්ධයකු මෙන්වේද? (නමුත්) අනුශාසනාව ලබාගන්නේ වටහාගැනීමට භාග්‍යය ලද අය පමණි.

الَّذِينَ يُوفُونَ بِعَهْدِ اللَّهِ وَلَا يَنقُضُونَ الْمِيثَاقَ ﴿٢١﴾

21. ඔවුන්, අල්ලාහ්ගේ ගිවිසුම ඉටුකරන එමෙන්ම ප්‍රතිඥාව කඩ නොකරන අයද,

وَالَّذِينَ يَصِلُونَ مَا أَمَرَ اللَّهُ بِهِ أَن يُوصَلَ وَيَخْشَوْنَ رَبَّهُمْ وَيَخَافُونَ

22. තවද එක්සත් කරවීමට අල්ලාහ් අණ කර ඇති දේ එක්සත් කරන්නන්ද තවද තමන්ගේ අධිපතියාණන්ට බිය වන්නන්ද තවද නපුරු ගණන් ගැනීමකට මහත්

سُوْٓءَ الْحِسَابِ ؕ ﴿٢٢﴾

බියෙන් සිටින්නන්ද,

وَالَّذِيْنَ صَبَرُوا ابْتِغَآءَ وَجْهِ رَبِّهِمْ وَاَقَامُوا الصَّلٰوةَ وَاَنْفَقُوْا مِمَّا رَزَقْنٰهُمْ سِرًّا وَّعَلَانِيَةً وَّيَدْرَءُوْنَ بِالْحَسَنَةِ السَّيِّئَةَ اُولٰٓئِكَ لَهُمْ عُقْبَى الدَّارِ ۙ ﴿٢٣﴾

23. තවද තම අධිපතියාණන්ගේ ප්‍රසාදය ලබාගැනිමෙහි නිරන්තරව ඉවසන අයද නැමදුමෙහි නිරතවන අයද අප ඔවුනට සපයා දී ඇති දෙයින් රහසිගතව සහ එළිපිටව වැයකරන අයද යහපත මගින් අයහපත වලක්වන අයද වේ. (පරලොව) වාසස්ථානයේ (විශිෂ්ඨතම) තිළිණය මොවුන්ටමය.

جَنّٰتُ عَدْنٍ يَّدْخُلُوْنَهَا وَمَنْ صَلَحَ مِنْ اٰبَآئِهِمْ وَاَزْوَاجِهِمْ وَذُرِّيّٰتِهِمْ وَالْمَلٰٓئِكَةُ يَدْخُلُوْنَ عَلَيْهِمْ مِّنْ كُلِّ بَابٍ ۚ ﴿٢٤﴾

24. (එනම්) සදාකාලික වූ උද්‍යානයන්ය. එහි ඔවුන්ද (එමෙන්ම) ඔවුන්ගේ පියවරුන්, ඔවුන්ගේ භාර්යාවන් සහ ඔවුන්ගේ දරුවන් අතුරින් ධාර්මිෂ්ඨ අය(ද) ඇතුල්වන්නෝය. තවද සුරදූතයින් සෑම දොරටුවකින්ම ඔවුන් වෙත (මෙසේ පවසමින්) ඇතුල්වනු ඇත.

سَلٰمٌ عَلَيْكُمْ بِمَا صَبَرْتُمْ فَنِعْمَ عُقْبَى الدَّارِ ؕ ﴿٢٥﴾

25. 'නුඹලා ස්ථිරසාරව සිටි බැවින් නුඹලාට සාමය අත්වේවා! වාසස්ථානයේ අවසානය කෙතරම් විශිෂ්ඨ දැයි බලනු'

وَالَّذِيْنَ يَنْقُضُوْنَ عَهْدَ اللّٰهِ مِنْۢ بَعْدِ مِيْثَاقِهٖ وَيَقْطَعُوْنَ مَآ اَمَرَ اللّٰهُ بِهٖٓ اَنْ يُّوْصَلَ وَيُفْسِدُوْنَ فِى الْاَرْضِ ۙ اُولٰٓئِكَ لَهُمُ اللَّعْنَةُ وَلَهُمْ سُوْٓءُ الدَّارِ ﴿٢٦﴾

26. තවද අල්ලාහ්ගේ ගිවිසුම ස්ථිර කළ පසු එය කඩකොට තවද එක්සත් කරවීමට අල්ලාහ් අණකළ දේ බිඳ දමමින් පොළොවෙහි කලහකාරීව හැසිරෙන අය කෙරෙහි ශාපය වන අතර නපුරු නිවහන ලැබෙනුයේ ඔවුන්ටමය.

اَللّٰهُ يَبْسُطُ الرِّزْقَ لِمَنْ يَّشَآءُ وَيَقْدِرُ ؕ وَفَرِحُوْا بِالْحَيٰوةِ الدُّنْيَا ؕ وَمَا الْحَيٰوةُ الدُّنْيَا فِى الْاٰخِرَةِ اِلَّا مَتَاعٌ ﴿٢٧﴾ ع

27. අල්ලාහ්, ඔහු කැමති කෙනෙකුට ජීවනෝපාය බහුලව දෙන්නේය. තවද (ඔහු කැමති කෙනෙකුට) අඩුවෙන් දෙන්නේය. තවද ඔවුහු මෙලෝ ජීවිතයෙහි ප්‍රීති වෙති. එනමුත් මෙලෝ ජීවිතය මතු පැමිණෙන දේ (පරලොව) සමඟ සසඳන විට (තාවකාලික) භුක්ති විඳීමක් මිස නැත.

28. තවද 'ඔහුගේ අධිපතියාණන් ගෙන් සලකුණක් ඔහු වෙත එවා නැත්තේ කුමක් හෙයින්දැ?'යි අවිශ්වාසිත අය පවසති. පවසන්න, 'අල්ලාහ්, ඔහු කැමති අයව නොමග යවන්නේය. තවද ඔහු තමා වෙත හැරෙන්නන්ට මග පෙන්වන්නේය'.

وَيَقُولُ الَّذِينَ كَفَرُوا لَوْلَا أُنزِلَ عَلَيْهِ
آيَةٌ مِّن رَّبِّهِ ۗ قُلْ إِنَّ اللَّهَ يُضِلُّ مَن يَشَاءُ
وَيَهْدِي إِلَيْهِ مَنْ أَنَابَ ﴿٢٨﴾

29. 'විශ්වාස කර එමෙන්ම අල්ලාහ්ව සිහි කිරීමෙන් තමන්ගේ හදවත් තෘප්තියට පත්වන අය ඔවුහු වෙති. දැනගනු! අල්ලාහ්ව සිහි කිරීමෙහි හදවත් තෘප්තියට පත්වන්නේය'.

الَّذِينَ آمَنُوا وَتَطْمَئِنُّ قُلُوبُهُم بِذِكْرِ
اللَّهِ ۗ أَلَا بِذِكْرِ اللَّهِ تَطْمَئِنُّ الْقُلُوبُ ﴿٢٩﴾

30. 'විශ්වාස කර එමෙන්ම යහපත් ක්‍රියාවන් කරන අයහට සොම්නසත් ආපසු පැමිණීමේ විශිෂ්ට ස්ථානයත් ලැබෙනු ඇත'.

الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ طُوبَىٰ
لَهُمْ وَحُسْنُ مَآبٍ ﴿٣٠﴾

31. අප ඔබ වෙත අනාවරණය කර ඇතිදේ ඔබ ඔවුන්ට පාරායනය කරනු පිණිස අපි ඔබව ජනතාවක් වෙත මෙලෙස යවා ඇත්තෙමු. ඔවුන්ට පෙර වෙනත් ජනතාවන් කාලක්‍රියා කර ඇත. එසේවුවද ඔවුහු කාරුණික (දෙවියන්) කෙරෙහි අවිශ්වාස කරති. 'ඔහු මාගේ අධිපතියාණන්ය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙක් නැත. මම ඔහු වෙතම මාගේ විශ්වාසය තබමි. තවද මාගේ ආපසු හැරීම ඔහු වෙතටමයැ'යි පවසන්න.

كَذَٰلِكَ أَرْسَلْنَاكَ فِي أُمَّةٍ قَدْ خَلَتْ
مِن قَبْلِهَا أُمَمٌ لِّتَتْلُوَ عَلَيْهِمُ الَّذِي
أَوْحَيْنَا إِلَيْكَ وَهُمْ يَكْفُرُونَ
بِالرَّحْمَٰنِ ۚ قُلْ هُوَ رَبِّي لَا إِلَٰهَ إِلَّا هُوَ
عَلَيْهِ تَوَكَّلْتُ وَإِلَيْهِ مَتَابِ ﴿٣١﴾

32. තවද කුර්ආනයක්, එමගින් පර්වත සෙලවිය හැකි නැතහොත් එමගින් පොළොව පැලිය හැකි නැතහොත් එමගින් මළවුන්ට කතා කරවිය හැකි වුවද (ඔවුන් එය විශ්වාස නොකරනු ඇත). නොඑසේය, විසඳුම මුළුමනින්ම අල්ලාහ් සතුය. අල්ලාහ් තම අභිමතය (ක්‍රියාත්මක) කරන්නට යෙදුනේ නම් ඔහුට සියළු

وَلَوْ أَنَّ قُرْآنًا سُيِّرَتْ بِهِ الْجِبَالُ أَوْ
قُطِّعَتْ بِهِ الْأَرْضُ أَوْ كُلِّمَ بِهِ الْمَوْتَىٰ ۗ
بَل لِّلَّهِ الْأَمْرُ جَمِيعًا ۗ أَفَلَمْ يَيْأَسِ
الَّذِينَ آمَنُوا أَن لَّوْ يَشَاءُ اللَّهُ لَهَدَى

النَّاسَ جَمِيعًا ۗ وَلَا يَزَالُ الَّذِينَ كَفَرُوا تُصِيبُهُم بِمَا صَنَعُوا قَارِعَةٌ أَوْ تَحُلُّ قَرِيبًا مِّن دَارِهِمْ حَتَّىٰ يَأْتِيَ وَعْدُ اللَّهِ ۚ إِنَّ اللَّهَ لَا يُخْلِفُ الْمِيعَادَ ﴿٣٢﴾

මානව වර්ගයාට නියතවශයෙන්ම මග පෙන්වීමට තිබුනු බව විශ්වාසිතයින් (තවමත්) දැනගත්තේ නැද්ද? තවද අවිශ්වාසිත අය ගත් කළ ඔවුන් කළ ක්‍රියා හේතුවෙන් ව්‍යසනය ඔවුන්ව හසු කරන්නේමය. නැතහොත් අල්ලාහ්ගේ පොරොන්දුව ඉටුවනතුරු එය ඔවුන්ගේ නිවැස් අසල පහළ වන්නේමය. නියතවශයෙන්ම අල්ලාහ් (තම) පොරොන්දුව කඩ නොකරන්නේමය.

وَلَقَدِ اسْتُهْزِئَ بِرُسُلٍ مِّن قَبْلِكَ فَأَمْلَيْتُ لِلَّذِينَ كَفَرُوا ثُمَّ أَخَذْتُهُمْ ۖ فَكَيْفَ كَانَ عِقَابِ ﴿٣٣﴾

33. තවද නියතවශයෙන්ම ඔබට පෙර දූතයින් සරදම් කරනු ලැබූහ. එහෙත් මම අවිශ්වාසිතයින්ට අවකාශය ලබාදුනිමි. ඉන්පසු මම ඔවුන්ව ග්‍රහණය කරගත්තෙමි. එසේ නම් මාගේ දඬුවම කෙසේ විද!

أَفَمَنْ هُوَ قَائِمٌ عَلَىٰ كُلِّ نَفْسٍ بِمَا كَسَبَتْ ۗ وَجَعَلُوا لِلَّهِ شُرَكَاءَ قُلْ سَمُّوهُمْ ۚ أَمْ تُنَبِّئُونَهُ بِمَا لَا يَعْلَمُ فِي الْأَرْضِ أَم بِظَاهِرٍ مِّنَ الْقَوْلِ ۗ بَلْ زُيِّنَ لِلَّذِينَ كَفَرُوا مَكْرُهُمْ وَصُدُّوا عَنِ السَّبِيلِ ۗ وَمَن يُضْلِلِ اللَّهُ فَمَا لَهُ مِنْ هَادٍ ﴿٣٤﴾

34. සෑම ආත්මයක් කෙරෙහිම එය උපයන දේ කුමක්දැයි (සටහන් කිරීමට) පරීක්ෂාකාරී වන ඔහු (දඬුවම් නොකර ඔවුන්ව අත්හරින්නේ)ද?. තවමත් ඔවුහු අල්ලාහ්ට සමානයන් තබති. පවසන්න 'ඔවුන්ව නම් කරනු'. නැතහොත් පොළොවෙහි ඔහු නොදන්නා දේ ගැන නුඹලා ඔහුට දැනුම් දෙන්නෙහුද? නැතහොත් එය (හුදෙක්) හිස් කියමනක්ද? නොඑසේය, නමුත් අවිශ්වාසිතයින්ගේ සැලැස්ම ඔවුන්ට අලංකාර ලෙස පෙනෙන්නට සලස්වන ලදී. තවද ඔවුන් (යහ) මාර්ගයෙන් වළක්වන ලද්දෝය. තවද අල්ලාහ් යමෙකුව නොමග යවන්නේද ඔහුට මගපෙන්වන්නෙක් නොවනු ඇත.

لَّهُمْ عَذَابٌ فِي الْحَيَاةِ الدُّنْيَا ۖ وَلَعَذَابُ الْآخِرَةِ أَشَقُّ ۖ وَمَا لَهُم مِّنَ اللَّهِ مِن وَاقٍ ﴿٣٥﴾

35. ඔවුන් සඳහා මෙලෝ ජීවිතයෙහි දඬුවමක් තිබේ. තවද නියතවශයෙන්ම පරලොවේ දඬුවම ඉතා දැඩිය. තවද අල්ලාහ්ට එරෙහිව කිසිදු ආරක්ෂකයෙක් ඔවුනට නොවන්නේය.

مَّثَلُ الْجَنَّةِ الَّتِي وُعِدَ الْمُتَّقُونَ ۖ تَجْرِي

36. දෙවියන් කෙරෙහි බිය

مِنْ تَحْتِهَا الْاَنْهٰرُ ؕ اُكُلُهَا دَآئِمٌ وَّظِلُّهَا ؕ تِلْكَ عُقْبَى الَّذِيْنَ اتَّقَوْا ۖ وَّعُقْبَى الْكٰفِرِيْنَ النَّارُ ﴿٣٦﴾

ඇත්තවුන්ට පොරොන්දු දෙනු ලැබූ ස්වර්ගයේ උපමාව වනුයේ ඒ මැදින් දිය දහරා ගලා බසිනු ඇත. එහි පළතුරු සදාකාලික වේ. තවද එහි සෙවණද (එසේමය). මෙය බිය බැතිමත් අයගේ තිළිණය වේ. තවද අවිශ්වාසිතයින්ගේ ප්‍රතිවිපාකය ගින්නය.

وَالَّذِيْنَ اٰتَيْنٰهُمُ الْكِتٰبَ يَفْرَحُوْنَ بِمَاۤ اُنْزِلَ اِلَيْكَ وَمِنَ الْاَحْزَابِ مَنْ يُّنْكِرُ بَعْضَهٗ ؕ قُلْ اِنَّمَاۤ اُمِرْتُ اَنْ اَعْبُدَ اللّٰهَ وَلَاۤ اُشْرِكَ بِهٖ ؕ اِلَيْهِ اَدْعُوْا وَاِلَيْهِ مَاٰبِ ﴿٣٧﴾

37. එමෙන්ම ඔබ වෙත පහළ කරනු ලැබ ඇති දේ කෙරෙහි අප පුස්තකය දී ඇති අය සතුටුවෙති. තවද (විවිධාකාර) පාර්ශවයන්ගෙන් සමහර අය එයින් කොටසක් ප්‍රතික්ෂේප කරති. පවසන්න 'මා අණ කරනු ලැබ ඇත්තේ අල්ලාහ්ව නැමදීමටත් ඔහුට සමානයන් නොතැබීමටත්ය. මම ඔහු වෙතටම කැඳවමි. තවද මාගේ ආපසු යෑම ඔහු වෙතටමය.'

وَكَذٰلِكَ اَنْزَلْنٰهُ حُكْمًا عَرَبِيًّا ؕ وَلَئِنِ اتَّبَعْتَ اَهْوَآءَهُمْ بَعْدَ مَا جَآءَكَ مِنَ الْعِلْمِ ۙ مَا لَكَ مِنَ اللّٰهِ مِنْ وَّلِيٍّ وَّلَا وَاقٍ ﴿٣٨﴾ ع

38. තවද මෙලෙස අපි එය පැහැදිලි විනිශ්චයක් ලෙස පහළ කළෙමු. තවද ඔබ වෙත ඥානය පැමිණීමෙන් පසුව ඔබ ඔවුන්ගේ දුෂ්ඨ ආශාවන් අනුගමනය කරන්නේ නම් අල්ලාහ්ට එරෙහිව ඔබට මිතුරෙකු හෝ ආරක්ෂකයෙකු නොවනු ඇත.

وَلَقَدْ اَرْسَلْنَا رُسُلًا مِّنْ قَبْلِكَ وَجَعَلْنَا لَهُمْ اَزْوَاجًا وَّذُرِّيَّةً ؕ وَمَا كَانَ لِرَسُوْلٍ اَنْ يَّاْتِيَ بِاٰيَةٍ اِلَّا بِاِذْنِ اللّٰهِ ؕ لِكُلِّ اَجَلٍ كِتَابٌ ﴿٣٩﴾

39. තවද ඇත්තෙන්ම අපි ඔබට පෙරද දූතයින් යැව්වෙමු. තවද අපි ඔවුන්ට භාර්යාවන් සහ දරුවන් දුනිමු. තවද අල්ලාහ්ගේ විධානයෙන් හැරෙන්නට දූතයෙකුට සළකුණක් ගෙන ආ නොහැක. සෑම කාලයක් සඳහාම (දේව) නියමයක් ඇත.

يَمْحُوا اللّٰهُ مَا يَشَآءُ وَيُثْبِتُ ۖ وَعِنْدَهٗۤ اُمُّ الْكِتٰبِ ﴿٤٠﴾

40. අල්ලාහ්, ඔහු අභිමත දෙයක් මකාදමන අතර ඔහු (අභිමත දෙයක්) ස්ථාපිත කරයි. තවද (සියළු) නියමයන්හි උල්පත ඔහු වෙතය.

41. තවද අප ඔවුන්ට අනතුරු ඇඟවූ සමහර දේ (ඉටුවීම) අප ඔබට දකින්නට සැලැස්වුවද, නැතහොත් අප ඔබව මිය යාමට සැලැස්වුවද, (එහි වෙනසක් නොවන්නේය). මන්ද ඔබ කෙරෙහි වගකීම වන්නේ පණිවිඩය පමුණුවීම පමණක්ය. තවද ගණන් ගැනීම අප කෙරෙහිය.

وَاِنْ مَّا نُرِيَنَّكَ بَعْضَ الَّذِىْ نَعِدُهُمْ اَوْ نَتَوَفَّيَنَّكَ فَاِنَّمَا عَلَيْكَ الْبَلٰغُ وَعَلَيْنَا الْحِسَابُ ﴿٤١﴾

42. අපි භූමිය එහි ඇති මායිම් වලින් එය අඩු කරමින් එන බව ඔවුහු නොදකින්නද? තවද අල්ලාහ් විනිශ්චය කරයි. ඔහුගේ විනිශ්චය වෙනස් කරන්නෙකු කිසිවෙක් නැත. තවද ගණන් ගැනීමේදී ඔහු ඉතා සීඝ්‍රය.

اَوَلَمْ يَرَوْا اَنَّا نَاْتِى الْاَرْضَ نَنْقُصُهَا مِنْ اَطْرَافِهَا ؕ وَاللّٰهُ يَحْكُمُ لَا مُعَقِّبَ لِحُكْمِهٖ ؕ وَهُوَ سَرِيْعُ الْحِسَابِ ﴿٤٢﴾

43. තවද ඔවුන්ට පෙර සිටි අය(ද) කුමන්ත්‍රණ කළහ. එහෙත් සියළු (තීරණාත්මක) සැලසුම් අල්ලාහ්ට අයත්ය. සෑම ආත්මයක්ම උපයන දේ ඔහු දනියි. (මෙම) වාසස්ථානයේ අවසන් ප්‍රතිවිපාකය වන්නේ කා හට දැයි අවිශ්වාසිතයින් ඉක්මනින් දැනගන්නෝය.

وَقَدْ مَكَرَ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ فَلِلّٰهِ الْمَكْرُ جَمِيْعًا ؕ يَعْلَمُ مَا تَكْسِبُ كُلُّ نَفْسٍ ؕ وَسَيَعْلَمُ الْكُفّٰرُ لِمَنْ عُقْبَى الدَّارِ ﴿٤٣﴾

44. තවද 'ඔබ දූතයෙක් නොවේ' යැයි අවිශ්වාසිතයින් පවසති. 'නුඹලා සහ මා අතර සාක්ෂියක් වශයෙන් අල්ලාහ් ප්‍රමාණවත් වේ. තවද ග්‍රන්ථයේ ඥානය කවරෙකුට ඇත්තේද ඔහුත් (ප්‍රමාණවත්)යැ'යි පවසන්න.

وَيَقُوْلُ الَّذِيْنَ كَفَرُوْا لَسْتَ مُرْسَلًا ؕ قُلْ كَفٰى بِاللّٰهِ شَهِيْدًاۢ بَيْنِىْ وَبَيْنَكُمْ ۙ وَمَنْ عِنْدَهٗ عِلْمُ الْكِتٰبِ ﴿٤٤﴾ ع



ඉබ්රාහිම්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓرٰ ۚ كِتٰبٌ اَنۡزَلۡنٰهُ اِلَيۡكَ لِتُخۡرِجَ النَّاسَ مِنَ الظُّلُمٰتِ اِلَى النُّوۡرِ ۙ بِاِذۡنِ رَبِّهِمۡ اِلٰى صِرَاطِ الۡعَزِيۡزِ الۡحَمِيۡدِ ۙ ②

2. අලිෆ් ලාම් රා◆ (මෙය) ග්‍රන්ථයකි. ඔබ මනුෂ්‍ය වර්ගයාව ඔවුන්ගේ අධිපතියාණන්ගේ විධානයෙන් සියළු (ආකාරයේ) අන්ධකාරයෙන් ආලෝකය වෙතට ගෙන යමින් බලසම්පන්නවූ ප්‍රශංසා හිමිගේ මාර්ගය වෙත (යොමු කිරීම) පිණිස, අප ඔබ වෙත මෙය පහළ කර ඇත්තෙමු.

اللّٰهِ الَّذِىۡ لَهٗ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الۡاَرۡضِ ؕ وَوَيۡلٌ لِّلۡكٰفِرِيۡنَ مِنۡ عَذَابٍ شَدِيۡدِ ۙ ③

3. අල්ලාහ්ය. අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද ඔහුටමය. තවද අවිශ්වාසිතයින්ට දරුණු දඬුවමකින් විපතකි.

اۨلَّذِيۡنَ يَسۡتَحِبُّوۡنَ الۡحَيٰوةَ الدُّنۡيَا عَلَى الۡاٰخِرَةِ وَيَصُدُّوۡنَ عَنۡ سَبِيۡلِ اللّٰهِ وَيَبۡغُوۡنَهَا عِوَجًا ؕ اُولٰۤٮِٕكَ فِىۡ ضَلٰلٍۢ بَعِيۡدٍ ④

4. ඔවුන් කවරෙකු නම්, පරලොවට වඩා මෙලොව ජීවිතය ප්‍රිය කරන්නාවූද තවද අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වන්නාවූද තවද එය ඇද කිරීමට තැත් කරන්නාවූද අය වෙති. දුර්මාර්ගයෙහි බොහෝ දුරට ගොස් ඇත්තෝ මොවුන්මය.

وَمَاۤ اَرۡسَلۡنَا مِنۡ رَّسُوۡلٍ اِلَّا بِلِسَانِ قَوۡمِهٖ لِيُبَيِّنَ لَهُمۡ ؕ فَيُضِلُّ اللّٰهُ مَنۡ يَّشَآءُ وَيَهۡدِىۡ مَنۡ يَّشَآءُ ؕ وَهُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ ⑤

5. තවද අපි කිසිදු දූතයෙකුව ඔහුගේ ජනයාගේ බසින්ම ඔහු ඔවුනට (විෂයයන්) පැහැදිලි කරනු පිණිස මිස නොඑව්වෙමු. පසුව අල්ලාහ්, ඔහු අභිමත අයව නොමග යෑමට ඉඩ හරින්නේය. ඔහු අභිමත අයට මග පෙන්වන්නේය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

◆ මම අල්ලාහ්, සියල්ල දකින්නා වෙමි.

وَلَقَدْ اَرْسَلْنَا مُوْسٰى بِاٰيٰتِنَآ اَنْ اَخْرِجْ قَوْمَكَ مِنَ الظُّلُمٰتِ اِلَى النُّوْرِ ۙ وَذَكِّرْهُمْ بِاَيّٰىمِ اللّٰهِ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّكُلِّ صَبَّارٍ شَكُوْرٍ ۞٦

06. තවද 'ඔබගේ ජනතාව සියළු (ආකාරයේ) අන්ධකාරයෙන් ආලෝකය වෙතට ගෙනෙනු. තවද අල්ලාහ්ගේ දිනයන් ගැන ඔවුන්ට සිහි කරනු'යි (පවසමින්) අපගේ සලකුණු සහිතව අපි මූසාව යැව්වෙමු. නියතවශයෙන්ම සෑම ඉවසිලිවන්ත (හා) කෘතගුණ දක්වන පුද්ගලයින්ට එහි සලකුණු ඇත.

وَاِذْ قَالَ مُوْسٰى لِقَوْمِهِ اذْكُرُوْا نِعْمَةَ اللّٰهِ عَلَيْكُمْ اِذْ اَنْجٰىكُمْ مِّنْ اٰلِ فِرْعَوْنَ يَسُوْمُوْنَكُمْ سُوْٓءَ الْعَذَابِ وَيُذَبِّحُوْنَ اَبْنَآءَكُمْ وَيَسْتَحْيُوْنَ نِسَآءَكُمْ ؕ وَفِيْ ذٰلِكُمْ بَلَآءٌ مِّنْ رَّبِّكُمْ عَظِيْمٌ ۞٧

07. තවද 'ෆිර්අවුන්ගේ මිනිසුන්ගෙන් ඔහු(අල්ලාහ්) නුඹලාව මුදවා ගත් කල්හි නුඹලා කෙරෙහි අල්ලාහ්ගේ අනුග්‍රහය සිහිපත් කරනු. ඔවුන් නුඹලාගේ පුතුන් ඝාතනය කරමින්, නුඹලාගේ ස්ත්‍රීන් ඉතුරු කරමින් නුඹලාට දරුණු වධ හිංසා කළෝය. තවද එහි නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලාට මහත්වූ පරීක්ෂණයක් වූයේයැ'යි මූසා ඔහුගේ ජනතාවට පැවසූ අවස්ථාව (සිහිකර ගනු).

وَاِذْ تَاَذَّنَ رَبُّكُمْ لَئِنْ شَكَرْتُمْ لَاَزِيْدَنَّكُمْ وَلَئِنْ كَفَرْتُمْ اِنَّ عَذَابِيْ لَشَدِيْدٌ ۞٨

08. තවද 'නුඹලා කෘතඥ වේ නම්, නියතවශයෙන්ම මම නුඹලාට වැඩියෙන් (අනුග්‍රහයන්) පිරිනමන්නෙමි. එහෙත් නුඹලා අකෘතඥ වේ නම් (එවිට දැනගනු) ඇත්තෙන්ම මාගේ දඬුවම දැඩි යැ'යි නුඹලාගේ අධිපතියාණන් ප්‍රකාශ කළ අවස්ථාව(ද සිහිපත් කරනු).

وَقَالَ مُوْسٰٓى اِنْ تَكْفُرُوْٓا اَنْتُمْ وَمَنْ فِي الْاَرْضِ جَمِيْعًا ۙ فَاِنَّ اللّٰهَ لَغَنِيٌّ حَمِيْدٌ ۞٩

09. තවද 'නුඹලා මෙන්ම පොළොවේ ඇති සියලු දෙනාම එක්ව අකෘතඥ වේ නම් (අල්ලාහ්ට කිසිඳු හානියක් කිරීමට නුඹලාට හැකි නොවේ). සැබැවින්ම අල්ලාහ් ස්වයං පෝෂිතය. ප්‍රශංසා හිමියැ' යි මූසා කීවේය.

اَلَمْ يَاْتِكُمْ نَبَؤُا الَّذِيْنَ مِنْ قَبْلِكُمْ قَوْمِ نُوْحٍ وَّعَادٍ وَّثَمُوْدَ ۛ وَالَّذِيْنَ مِنْۢ بَعْدِهِمْ ۛ لَا يَعْلَمُهُمْ اِلَّا اللّٰهُ ؕ جَآءَتْهُمْ

10. නුඹලාට පෙර සිටි නූහ්ගේ ජනතාවද, ආද් හා සමූද් (ගෝත්‍රයන්)ද සහ ඔවුනට පසු සිටි අය පිළිබඳව ආරංචි නුඹලා වෙත නොපැමිණියේද? (දැන්) අල්ලාහ් හැර අන් කිසිවෙක් ඔවුන්ව නොදනිති. පැහැදිලි සලකුණු සහිතව ඔවුන්ගේ

رُسُلُهُم بِٱلْبَيِّنَٰتِ فَرَدُّوٓا۟ أَيْدِيَهُمْ فِىٓ أَفْوَٰهِهِمْ وَقَالُوٓا۟ إِنَّا كَفَرْنَا بِمَآ أُرْسِلْتُم بِهِۦ وَإِنَّا لَفِى شَكٍّ مِّمَّا تَدْعُونَنَآ إِلَيْهِ مُرِيبٍ ⑩

*දූතයන් ඔවුන් වෙත පැමිණියහ. නමුත් ඔවුහු ඔවුන්ගේ අත් ඔවුන්ගේ මුව වෙතට හරවා ගත්හ. තවද 'ඔබ කුමන දේ සමඟින් එවනු ලැබුවේද ඒ කෙරෙහි අපි ප්‍රතික්ෂේප කරන්නෙමු. තවද නියතවශයෙන්ම ඔබ කවර දේ වෙත අපව කැඳවන්නේද ඒ පිළිබඳව නොසැනසිල්ලක් ඇතිකරන්නාවූ සැකයෙහි සිටින්නෙමු'යි කීහ.

قَالَتْ رُسُلُهُمْ أَفِى ٱللَّهِ شَكٌّ فَاطِرِ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ ۖ يَدْعُوكُمْ لِيَغْفِرَ لَكُم مِّن ذُنُوبِكُمْ وَيُؤَخِّرَكُمْ إِلَىٰٓ أَجَلٍ مُّسَمًّى ۚ قَالُوٓا۟ إِنْ أَنتُمْ إِلَّا بَشَرٌ مِّثْلُنَا تُرِيدُونَ أَن تَصُدُّونَا عَمَّا كَانَ يَعْبُدُ ءَابَآؤُنَا فَأْتُونَا بِسُلْطَٰنٍ مُّبِينٍ ⑪

11. 'අහස් සහ පොළොවේ මැවුම්කරුවාණන් වන අල්ලාහ් සම්බන්ධයෙන් නුඹලා සැකයෙහි සිටින්නෙහුද? ඔහු නුඹලාගේ පව්වලට නුඹලාට ක්ෂමාව දීමටත් නුඹලාට නියමිත කාලයක් දක්වා අවකාශයක් ලබාදීමටත් ඔහු නුඹලාව කැඳවන්නේයැ'යි ඔවුන්ගේ දූතයෝ කීහ. 'නුඹලා අප වැනි මිනිසුන් මිස නැත. අපගේ පියවරුන් නැමදුම් කළ දෙයින් අපව ඉවත් කිරීමට නුඹලා කැමැති වන්නෙහුය. එසේ නම් පැහැදිලි සාධකයක් අප වෙත ගෙන එනු' යි ඔවුහු කීහ.

*සටහන 10: 'ෆරද්දූ අයිදියහුම් ෆී අෆ්වාහිහිම්' (فَرَدُّوٓا۟ أَيْدِيَهُمْ فِىٓ أَفْوَٰهِهِمْ) යන කුර්ආන් වාක්‍යය (එනම් ඔවුන් ඔවුන්ගේ අත් ඔවුන්ගේ මුව වෙතට හරවා ගනිති) යමෙක් තම අත තමන්ගේ මුව දෙසට හරවන ස්වරූපයෙන් පෙන්නුම් කරන්නේ වළක්වාලීමක්ය. මෙම විශේෂිතවූ ප්‍රකාශනය විග්‍රහ කිරීමට පෙර, යමෙක් මෙම වාක්‍යයෙහි සඳහන් වන්නේ කවුරුන් ගැනදැයි තීරණය කළ යුතුය. සාක්ෂියානුකූලව මෙම ක්‍රියාව අවිශ්වාසීතයින්ට ආරෝපණය කරනු ලැබූවකි. එමනිසා එය දෙආකාරයට අර්ථ දැක්විය හැක. එනම් අවිශ්වාසීතයින් තමන්ගේම අතින් තම මුව තද කරන්නා සේ එය පරිවර්ථනය කළ හැක. මෙහි අරුත වන්නේ දූතයන් සහ ඔවුන්ගේ අනුගාමිකයින් සමඟ සාකච්ඡා කිරීම ඔවුන් ප්‍රතික්ෂේප කළ බවය. පුද්ගලයෙක් අවසානයේදී තමන්ට කරකියාගත නොහැකි එමෙන්ම තර්ක කිරීමටද නොහැකි වූ විටදී මෙම තත්ත්වයට පත්වෙයි. එවිට ඔහු ඔහුට කිසිවක් කීමට නොහැකි බව පෙන්වමින් මෙවන් වැලකී සිටින්නාවූ ඉරියව්වක් ගනියි.

දෙවන අර්ථය දැක්වීමෙහිදී මෙම සඳහන විය හැක්කේ දූතයින්ගේ කටවල් දෙසටය. මෙහිදී එවැනිම සාකච්ඡාවෙහි බිඳීමක් පෙන්නුම් කළද එය වෙනස් ආකාරයකින් වේ. එහෙයින් මෙහි පණිවිඩය වන්නේ අවිශ්වාසීතයින් දූතයින්ට තම කටවල් වසාගන්නා ලෙස පවසමින් අවසානයේදී දූතයින් තවතවත් ප්‍රචාරය කිරීම නවත්වාලීමය. අවිශ්වාසීතයින් දිගින් දිගටම වර්ධනය කරන මෙම වාක්‍යයේ ඉතිරි කොටසේ එන 'ඔබ කුමන දේ සමඟින් එවනු ලැබුවේද ඒ කෙරෙහි අපි ප්‍රතික්ෂේප කරන්නෙමු. තවද නියතවශයෙන්ම ඔබ කවර දේ වෙත අපව කැඳවන්නේද ඒ පිළිබඳව පැහැදිලි සැකයෙහි සිටින්නෙමු' යන තේමාව තවදුරටත් මෙම විකල්පයට රුකුල් දෙයි.

12. ඔවුන්ගේ දූතයෝ ඔවුනට 'අපි ඇත්තෙන්ම නුඹලා වැනි මිනිසුන්ම වෙමු. එහෙත් අල්ලාහ් තම දාසයින් අතුරින් ඔහු කැමති කවරෙකුට හෝ (තම) අනුග්‍රහය පිරිනමන්නේය. තවද අල්ලාහ්ගේ විධානයෙන් හැරෙන්නට නුඹලා වෙත සාධකයක් ගෙන ඒම අපට කළ නොහැක. තවද විශ්වාසිතයින් තමන්ගේ විශ්වාසය අල්ලාහ් කෙරෙහි (පමණක්) තැබිය යුතුයැ'යි කීහ.

قَالَتْ لَهُمْ رُسُلُهُمْ اِنْ نَّحْنُ اِلَّا بَشَرٌ
مِّثْلُكُمْ وَلٰكِنَّ اللّٰهَ يَمُنُّ عَلٰى مَنْ يَّشَآءُ
مِنْ عِبَادِهٖ ؕ وَمَا كَانَ لَنَآ اَنْ نَّاْتِيَكُمْ
بِسُلْطٰنٍ اِلَّا بِاِذْنِ اللّٰهِ ؕ وَعَلَى اللّٰهِ
فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ۝١٢

13. 'තවද අපගේ මාර්ගයන් ඔහු අපට පෙන්වාදී තිබියදී අප අල්ලාහ් කෙරෙහි අපගේ විශ්වාසය නොතැබිය යුත්තේ ඇයි? තවද නුඹලා අපට කරන සියළු පීඩාවන් නියතවශයෙන්ම අපි ඉවසිලිවන්තව දරාගන්නෙමු. එබැවින් විශ්වාසය තබන්නෝ අල්ලාහ් කෙරෙහි ඔවුන්ගේ විශ්වාස තැබිය යුතුය'.

وَمَا لَنَآ اَلَّا نَتَوَكَّلَ عَلَى اللّٰهِ وَقَدْ هَدٰنَا
سُبُلَنَا ؕ وَلَنَصْبِرَنَّ عَلٰى مَآ اٰذَيْتُمُوْنَا ؕ
وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُتَوَكِّلُوْنَ ۝١٣ ع

14. තවද අවිශ්වාසිත අය තමන්ගේ දූතයින්ට 'නියතවශයෙන්ම අපි නුඹලාව අපගේ දේශයෙන් පිටමං කරන්නෙමු. නැතිනම් නුඹලා අපගේ ආගම වෙත ආපසු පැමිණිය යුතු යැ'යි කීහ. පසුව ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන් වෙත 'නියතවශයෙන්ම අපි වරදකරුවන්ව විනාශ කරන්නෙමු'යි අනාවරණය කළේය.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا لِرُسُلِهِمْ
لَنُخْرِجَنَّكُمْ مِّنْ اَرْضِنَآ اَوْ لَتَعُوْدُنَّ فِىْ
مِلَّتِنَا ؕ فَاَوْحٰۤى اِلَيْهِمْ رَبُّهُمْ لَنُهْلِكَنَّ
الظّٰلِمِيْنَ ۝١٤

15. 'තවද ඔවුන්ගෙන් පසු අපි නියතවශයෙන්ම නුඹලාව භූමියෙහි වාසය කිරීමට සලස්වන්නෙමු. මෙය මාගේ ස්ථානයට ගරු බිය දක්වන්නාටද එමෙන්ම මාගේ අනතුරු ඇඟවීම තකන්නාටද වේ.'

وَلَنُسْكِنَنَّكُمُ الْاَرْضَ مِنْۢ بَعْدِهِمْ ؕ ذٰلِكَ
لِمَنْ خَافَ مَقَامِىْ وَخَافَ وَعِيْدِ ۝١٥

16. තවද ඔවුහු ජයග්‍රහණය පැතූහ. තවද (එහි ප්‍රතිඵලයක් වශයෙන්) සෑම (සත්‍යයේ) අහංකාර සතුරෙක්ම විනාශයට පත්විය.

وَاسْتَفْتَحُوْا وَخَابَ كُلُّ جَبَّارٍ عَنِيْدٍ ۝١٦

17. ඔහු ඉදිරියෙහි ඇත්තේ

مِّنْ وَّرَآئِهٖ جَهَنَّمُ وَيُسْقٰى مِنْ

مَّآءٍ صَدِيْدٍ ۙ ﴿١٧﴾

නිරය වේ. තවද ඔහුට උතුරන්නාවූ ජලය පොවනු ලබන්නේය.

يَّتَجَرَّعُهٗ وَلَا يَكَادُ يُسِيْغُهٗ وَيَأْتِيْهِ
الْمَوْتُ مِنْ كُلِّ مَكَانٍ وَّمَا هُوَ بِمَيِّتٍ ۖ
وَمِنْ وَّرَآئِهٖ عَذَابٌ غَلِيْظٌ ﴿١٨﴾

18. ඔහු එය අකමැත්තෙන් ටිකෙන් ටික පානය කරයි. එය එකවර බිමට නොහැකි වන්නේය. තවද හැම පැත්තකින්ම ඔහුට මරණය පැමිණෙනු ඇත. (එහෙත්) ඔහු මරණයට පත් නොවනු ඇත. තවද එයට අමතරව (ඔහුට) දැඩි දඬුවමක්ද වනු ඇත.

مَثَلُ الَّذِيْنَ كَفَرُوْا بِرَبِّهِمْ اَعْمَالُهُمْ
كَرَمَادِ ۨاشْتَدَّتْ بِهِ الرِّيْحُ فِيْ يَوْمٍ
عَاصِفٍ ۖ لَا يَقْدِرُوْنَ مِمَّا كَسَبُوْا
عَلٰى شَيْءٍ ۖ ذٰلِكَ هُوَ الضَّلٰلُ الْبَعِيْدُ ﴿١٩﴾

19. සිය අධිපතියාණන් අවිශ්වාස කරන අයගේ තත්ත්වය වන්නේ ඔවුන්ගේ ක්‍රියාවන් කුණාටු සහිත දිනයක සුළඟ තදින් හැමූ අළු බඳුය. ඔවුන් උපයාගත් දේ කෙරෙහි ඔවුනට කිසිදු බලයක් නැත. එය ඇත්තෙන්ම අන්ත විනාශය වේ.

اَلَمْ تَرَ اَنَّ اللّٰهَ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ
بِالْحَقِّ ۖ اِنْ يَّشَاْ يُذْهِبْكُمْ وَ يَاْتِ
بِخَلْقٍ جَدِيْدٍ ۙ ﴿٢٠﴾

20. අල්ලාහ් අහස් සහ පොළොව සත්‍යය සමඟ නිර්මාණය කළ බව ඔබ නොදකින්නෙහිද? ඔහු අභිමත නම් ඔහුට නුඹලාව ඉවත්කර නව මැවීමක් ගෙන ආ හැක.

وَّمَا ذٰلِكَ عَلَى اللّٰهِ بِعَزِيْزٍ ﴿٢١﴾

21. තවද එය අල්ලාහ්ට (කිසිසේත්ම) අසීරු නොවේ.

وَبَرَزُوْا لِلّٰهِ جَمِيْعًا فَقَالَ الضُّعَفٰٓؤُا
لِلَّذِيْنَ اسْتَكْبَرُوْٓا اِنَّا كُنَّا لَكُمْ تَبَعًا
فَهَلْ اَنْتُمْ مُّغْنُوْنَ عَنَّا مِنْ عَذَابِ اللّٰهِ
مِنْ شَيْءٍ ۖ قَالُوْا لَوْ هَدٰىنَا اللّٰهُ
لَهَدَيْنٰكُمْ ۖ سَوَآءٌ عَلَيْنَآ اَجَزِعْنَآ اَمْ

22. ඔවුන් සියළුදෙනාම අල්ලාහ් ඉදිරියේ පෙනී සිටිනු ඇත. එවිට දුබලයින්, අහංකාරව හැසුරුණු අය වෙත 'නියතවශයෙන්ම අපි නුඹලාගේ අනුගාමිකයන් වීමු. එසේ හෙයින් අල්ලාහ්ගේ දඬුවමට එරෙහිව නුඹලාට අප වෙනුවෙන් කිසිවක් ඉවත්කළ නොහැක්කේදැ?'යි කියනු ඇත. ඔවුහු 'අල්ලාහ් අපට මග පෙන්වා ඇත්නම්, අපට නියතවශයෙන්ම නුඹලාට මග පෙන්වන්නට තිබුණි. (එහෙත් දැන්)

صَبَرْنَا مَا لَنَا مِن مَّحِيصٍ ﴿٢٢﴾

ඉවසිලිමත්වීමත් කලබල වීමත් අපට එක හා සමානය. අපට ගැලවීමට කිසිදු මගක් නැතැ'යි කියන්නෝය.

وَقَالَ الشَّيْطَٰنُ لَمَّا قُضِيَ الْأَمْرُ إِنَّ اللَّهَ وَعَدَكُمْ وَعْدَ الْحَقِّ وَوَعَدتُّكُمْ فَأَخْلَفْتُكُمْ ۖ وَمَا كَانَ لِيَ عَلَيْكُم مِّن سُلْطَٰنٍ إِلَّا أَن دَعَوْتُكُمْ فَاسْتَجَبْتُمْ لِي ۖ فَلَا تَلُومُونِي وَلُومُوا أَنفُسَكُم ۖ مَّا أَنَا بِمُصْرِخِكُمْ وَمَا أَنتُم بِمُصْرِخِيَّ ۖ إِنِّي كَفَرْتُ بِمَا أَشْرَكْتُمُونِ مِن قَبْلُ ۗ إِنَّ الظَّٰلِمِينَ لَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿٢٣﴾

23. තවද මෙම කාරණය තීරණය කරනු ලබන විට ෂෙයිතාන් 'සත්‍යවූ ප්‍රතිඥාවක් අල්ලාහ් නුඹලාට පොරොන්දු විය. නමුත් මා නුඹලාට පොරොන්දු වී එය නුඹලාට කඩ කළෙමි. මා නුඹලාව අඬගැසුවෙමි. නුඹලා මාහට අවනත වූවෙහුය. එය හැරෙන්නට නුඹලා කෙරෙහි මාහට කිසිදු බලයක් නොතිබුණි. එබැවින් මට දොස් නොපවරනු. නමුත් නුඹලා නුඹලාටම දොස් පවරාගනු. මාහට නුඹලාගේ විපතට පිහිටවිය නොහැක. එමෙන්ම නුඹලාටද මාගේ විපතට පිහිටවිය නොහැක. නුඹලා මාව (අල්ලාහ්ට) සමාන තැබීම මේවනවිටත් මම ප්‍රතික්ෂේප කර ඇත්තෙමි'යි කියනු ඇත. (එවිට අල්ලාහ් මෙසේ පවසයි) නියතවශයෙන්ම වරදකරුවන්ට වේදනීය දඬුවමක් ඇත.

وَأُدْخِلَ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّٰلِحَٰتِ جَنَّٰتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَٰرُ خَٰلِدِينَ فِيهَا بِإِذْنِ رَبِّهِمْ ۖ تَحِيَّتُهُمْ فِيهَا سَلَٰمٌ ﴿٢٤﴾

24. තවද විශ්වාස කර යහපත් ක්‍රියාවන් කළ අයව, ඒතුලින් ගලා බස්නා ගංගාවල් සහිත උද්‍යානයන්හි ඇතුළු කරනු ලබන්නේය. සිය අධිපතියාණන්ගේ අණ පරිදි ඔවුන් එහිම වෙසෙන්නෝය. එහිදී ඔවුන්ගේ පැතුම වන්නේ 'සාමය' යන්නයි.

أَلَمْ تَرَ كَيْفَ ضَرَبَ اللَّهُ مَثَلًا كَلِمَةً طَيِّبَةً كَشَجَرَةٍ طَيِّبَةٍ أَصْلُهَا ثَابِتٌ وَفَرْعُهَا فِي السَّمَاءِ ﴿٢٥﴾

25. අල්ලාහ් යහපත් වදනක් උපමාව ලෙස දක්වන්නේ කෙසේදැයි ඔබ නොදකින්නෙහිද? (එය) හොඳ ගසක් වැනිය. එහි මුල ස්ථිරසාරය. තවද එහි අතු අහසට (විහිදෙන්නේ)ය.

تُؤْتِىٓ أُكُلَهَا كُلَّ حِينٍۭ بِإِذْنِ رَبِّهَا ۗ وَيَضْرِبُ ٱللَّهُ ٱلْأَمْثَالَ لِلنَّاسِ لَعَلَّهُمْ يَتَذَكَّرُونَ ﴿٢٦﴾

26. එය ස්වකීය අධිපතියාණන්ගේ විධානයෙන් සෑමවිටම එහි ඵල ගෙන දෙන්නේය. තවද, මිනිසුන්ට, ඔවුන් මෙනෙහි කරනු පිණිස අල්ලාහ් උපමාවන් ගෙනහැර දක්වයි.

وَمَثَلُ كَلِمَةٍ خَبِيثَةٍ كَشَجَرَةٍ خَبِيثَةٍ ٱجْتُثَّتْ مِن فَوْقِ ٱلْأَرْضِ مَا لَهَا مِن قَرَارٍ ﴿٢٧﴾

27. තවද අයහපත් වදනක තත්ත්වය පොළොව මතින් මුලිනුපුටා දමන ලද නපුරු ගසකට සමානය. එයට ස්ථිරබවක් නොමැත.

يُثَبِّتُ ٱللَّهُ ٱلَّذِينَ ءَامَنُوا۟ بِٱلْقَوْلِ ٱلثَّابِتِ فِى ٱلْحَيَوٰةِ ٱلدُّنْيَا وَفِى ٱلْـَٔاخِرَةِ ۖ وَيُضِلُّ ٱللَّهُ ٱلظَّـٰلِمِينَ ۚ وَيَفْعَلُ ٱللَّهُ مَا يَشَآءُ ﴿٢٨﴾

28. මෙලොව ජීවිතයෙහිද පරලොවෙහිද (දෙකෙහිම) දැඩි ලෙස ස්ථාවරවූ වදනින් අල්ලාහ් විශ්වාසිතයින්ව ශක්තිමත් කරයි. තවද අල්ලාහ් වරදකරුවන්ව නොමග යාමට ඉඩ හරියි. තවද අල්ලාහ්, ඔහු අභිමත දේ කරයි.

أَلَمْ تَرَ إِلَى ٱلَّذِينَ بَدَّلُوا۟ نِعْمَتَ ٱللَّهِ كُفْرًا وَأَحَلُّوا۟ قَوْمَهُمْ دَارَ ٱلْبَوَارِ ﴿٢٩﴾

29. අල්ලාහ්ගේ අනුග්‍රහය අකෘතඥබවට හරවාගෙන තමන්ගේ ජනතාව විනාශයේ ගෘහයට ගෙන දැමූ අයව ඔබ නොදුටුවෙහිද?

جَهَنَّمَ يَصْلَوْنَهَا ۖ وَبِئْسَ ٱلْقَرَارُ ﴿٣٠﴾

30. (එනම් එය) නිරය(යි). ඔවුන් එහි දැවෙනු ඇත. තවද එය නපුරු නවාතැනක් වේ.

وَجَعَلُوا۟ لِلَّهِ أَندَادًا لِّيُضِلُّوا۟ عَن سَبِيلِهِۦ ۗ قُلْ تَمَتَّعُوا۟ فَإِنَّ مَصِيرَكُمْ إِلَى ٱلنَّارِ ﴿٣١﴾

31. ඔවුහු අල්ලාහ්ට සමානයන් ඇති කළේ ඔහුගේ මාර්ගයෙන් (ජනතාව) නොමග යැවීම සඳහාය. පවසන්න, 'නුඹලා ටික කලක් විනෝදවනු. පසුව නියතවශයෙන්ම නුඹලාගේ ගමන ගින්න වෙතට වේ.'

قُل لِّعِبَادِىَ ٱلَّذِينَ ءَامَنُوا۟ يُقِيمُوا۟ ٱلصَّلَوٰةَ وَيُنفِقُوا۟ مِمَّا رَزَقْنَـٰهُمْ سِرًّا وَعَلَانِيَةً مِّن

32. කිසිදු ගණුදෙනු කිරීමක්ද නොමැති කිසිදු මිත්‍රත්වයක්ද නොමැති දිනය පැමිණීමට පෙර විශ්වාස කර ඇති මාගේ දාසයින්ට ඔවුන්

قَبْلِ اَنْ يَّاْتِىَ يَوْمٌ لَّا بَيْعٌ فِيْهِ وَلَا خِلٰلٌ ﴿٣٢﴾

නැමදුමෙහි නිරත විය යුතු බවත් අප ඔවුනට ලබාදී ඇති දෙයින් රහසිගතව හා එළිපිට වැය කළයුතු බවත් පවසන්න.

اَللّٰهُ الَّذِىْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ وَاَنْزَلَ مِنَ السَّمَآءِ مَآءً فَاَخْرَجَ بِهٖ مِنَ الثَّمَرٰتِ رِزْقًا لَّكُمْ ۚ وَسَخَّرَ لَكُمُ الْفُلْكَ لِتَجْرِىَ فِى الْبَحْرِ بِاَمْرِهٖ ۚ وَسَخَّرَ لَكُمُ الْاَنْهٰرَ ۚ ﴿٣٣﴾

33. අහස් සහ පොළොව මවා තවද වළාකුළුවලින් ජලය පහළ කර තවද එමගින් නුඹලාගේ පැවැත්මට පළතුරුද හටගැන්වූයේ අල්ලාහ් වන ඔහුය. තවද ඔහුගේ විධානයෙන් නැව් මුහුදෙහි යාත්‍රාකරනු පිණිස එය නුඹලාට සේවය පිණිස යොදවා ඇත. තවද ඔහු සේවය පිණිස නුඹලාට ගංගාවන්(ද) යොදවා ඇත.

وَسَخَّرَ لَكُمُ الشَّمْسَ وَالْقَمَرَ دَآىِٕبَيْنِ ۚ وَسَخَّرَ لَكُمُ الَّيْلَ وَالنَّهَارَ ۚ ﴿٣٤﴾

34. තවද ඔහු අඛණ්ඩව ගමන්කරන ඉර සහ සඳ නුඹලා වෙනුවෙන් සේවයට නියම කළේය. තවද ඔහු රාත්‍රිය සහ දවාල නුඹලා සඳහා සේවයට යටත් කළේය.

وَاٰتٰىكُمْ مِّنْ كُلِّ مَا سَاَلْتُمُوْهُ ۗ وَاِنْ تَعُدُّوْا نِعْمَتَ اللّٰهِ لَا تُحْصُوْهَا ۗ اِنَّ الْاِنْسَانَ لَظَلُوْمٌ كَفَّارٌ ۚ ﴿٣٥﴾

35. තවද නුඹලා ඔහු වෙතින් ඉල්ලූ සියල්ලම ඔහු නුඹලාට දුන්නේය. තවද නුඹලා අල්ලාහ්ගේ අනුග්‍රහයන් ගණන් කිරීමට (උත්සාහ) කළහොත් නුඹලාට ඒවා ගණන්කිරීමට නොහැකිවන්නේය. සැබැවින්ම මිනිසා ඉතා අසාධාරණය. ඉතා අකෘතඥය.

وَاِذْ قَالَ اِبْرٰهِيْمُ رَبِّ اجْعَلْ هٰذَا الْبَلَدَ اٰمِنًا وَّاجْنُبْنِىْ وَبَنِىَّ اَنْ نَّعْبُدَ الْاَصْنَامَ ۗ ﴿٣٦﴾

36. 'මාගේ අධිපතියාණනි! මෙම නගරය සාමකාමී (නගරයක්) බවට පත්කරනු මැනව. තවද මා සහ මාගේ දරුවන්ව ප්‍රතිමා පිදීමෙන් වළක්වා තබනු මැනව'යි ඉබ්රාහීම් පැවසූ අවස්ථාව (සිහිපත් කරනු).

رَبِّ اِنَّهُنَّ اَضْلَلْنَ كَثِيْرًا مِّنَ النَّاسِ ۚ فَمَنْ تَبِعَنِىْ فَاِنَّهٗ مِنِّىْ ۚ وَمَنْ عَصَانِىْ

37. 'මාගේ අධිපතියාණනි! ඇත්තෙන්ම ඔවුන් මිනිස් වර්ගයා ගෙන් බොහෝ දෙනෙකුව නොමග යවා ඇත. එබැවින් මා අනුගමනය කරන කවරකු හෝ වේවා සහතිකවම ඔහු

فَإِنَّكَ غَفُورٌ رَّحِيمٌ ﴿٣٧﴾

මගෙන්මය. තවද මට අකීකරු වන කවරෙකු හෝ වේවා නියතවශයෙන්ම ඔබ අතිශයින් ක්ෂමාන්විතය, පරම දයාබරය'.

رَبَّنَآ إِنِّيٓ أَسْكَنتُ مِن ذُرِّيَّتِى بِوَادٍ غَيْرِ ذِى زَرْعٍ عِندَ بَيْتِكَ ٱلْمُحَرَّمِ رَبَّنَا لِيُقِيمُوا۟ ٱلصَّلَوٰةَ فَٱجْعَلْ أَفْـِٔدَةً مِّنَ ٱلنَّاسِ تَهْوِىٓ إِلَيْهِمْ وَٱرْزُقْهُم مِّنَ ٱلثَّمَرَٰتِ لَعَلَّهُمْ يَشْكُرُونَ ﴿٣٨﴾

38. 'අපගේ අධිපතියාණනි! ඔබගේ ශුද්ධවූ නිවස අසල වගාකළ නොහැකි මිටියාවතක මාගේ දරුවන්ගෙන් සමහරෙකුව මම පදිංචි කරවා ඇත්තෙමි. අපගේ අධිපතියාණෙනි! (මා එසේ කළේ) ඔවුන් නැමදුමෙහි නිරතවනු පිණිසය. එබැවින් මිනිසුන්ගේ හදවත් ඔවුන් වෙත නැඹුරුවීමට සලස්වනු මැනව. තවද ඔවුන් කෘතගුණ දක්වනු පිණිස ඔවුනට පළතුරුවලින් සපයනු මැනව'.

رَبَّنَآ إِنَّكَ تَعْلَمُ مَا نُخْفِى وَمَا نُعْلِنُ ۗ وَمَا يَخْفَىٰ عَلَى ٱللَّهِ مِن شَىْءٍ فِى ٱلْأَرْضِ وَلَا فِى ٱلسَّمَآءِ ﴿٣٩﴾

39. 'අපගේ අධිපතියාණනි! සහතිකවම අප සඟවන දේත් අප හෙළිකරන දේත් ඔබ දන්නෙහිය. තවද පොළොවෙහි හෝ අහසෙහි හෝ කිසිවක් අල්ලාහ්ගෙන් සැඟවී නැත.'

ٱلْحَمْدُ لِلَّهِ ٱلَّذِى وَهَبَ لِى عَلَى ٱلْكِبَرِ إِسْمَٰعِيلَ وَإِسْحَٰقَ ۚ إِنَّ رَبِّى لَسَمِيعُ ٱلدُّعَآءِ ﴿٤٠﴾

40. '(මාගේ) මහළු වියෙහිදී මාහට ඉස්මාඊල් සහ ඉස්හාක් ලබාදුන් අල්ලාහ්ට සියළු ප්‍රශංසා හිමිය. නියතවශයෙන්ම මාගේ අධිපතියාණන් යාච්ඤාවට සවන් දෙන්නාය.'

رَبِّ ٱجْعَلْنِى مُقِيمَ ٱلصَّلَوٰةِ وَمِن ذُرِّيَّتِى ۚ رَبَّنَا وَتَقَبَّلْ دُعَآءِ ﴿٤١﴾

41. 'මාගේ අධිපතියාණනි! මා හා මගේ දරුවන්ව(ද) නැමදුමෙහි නිරත වීමට සලස්වනු මැනව. අපගේ අධිපතියාණනි! මාගේ යාච්ඤාව පිළිගනු මැනව.'

رَبَّنَا ٱغْفِرْ لِى وَلِوَٰلِدَىَّ وَلِلْمُؤْمِنِينَ يَوْمَ يَقُومُ ٱلْحِسَابُ ﴿٤٢﴾

42. 'අපගේ අධිපතියාණනි! මාහටද මාගේ දෙමව්පියන්ටද එමෙන්ම විශ්වාසිතයින්ටද ගණන් ගන්නාවූ දිනයේදී ක්ෂමාව දෙනු මැනව.'

وَلَا تَحْسَبَنَّ ٱللَّهَ غَٰفِلًا عَمَّا يَعْمَلُ

43. තවද වැරදි කරන්නන් කරන දේ ගැන අල්ලාහ් නොවිමසිලිමත්

යැයි නොසිතන්න. ඇස් නොසොල්වා බලා සිටින්නාවූ එම දිනය තෙක් පමණක් ඔහු ඔවුනට විරාමයක් ලබා දෙන්නේය.

الظّٰلِمُوْنَ ۬ اِنَّمَا يُؤَخِّرُهُمْ لِيَوْمٍ تَشْخَصُ فِيْهِ الْاَبْصَارُ ۙ﴿٤٣﴾

44. ඔවුන් තමන්ගේ හිස් ඔසවමින් හිතියෙන් කඩිමුඩිව දුවති. ඔවුන්ගේ නොසැලෙන බැල්ම ඔවුන් වෙත ආපසු නොඑන්නේය. තවද ඔවුන්ගේ සිත් (මුළුමණින්ම) හිස්ය.

مُهْطِعِيْنَ مُقْنِعِيْ رُءُوْسِهِمْ لَا يَرْتَدُّ اِلَيْهِمْ طَرْفُهُمْ ۚ وَاَفْـِٕدَتُهُمْ هَوَآءٌ ﴿٤٤﴾

45. තවද (පොරොන්දුවූ) දඬුවම ඔවුන් වෙත පැමිණෙන්නාවූ දිනය පිළිබඳව මිනිසුන්ට අනතුරු අඟවන්න. තවද වරදකරුවන්, 'අපගේ අධිපතියාණනි! අපට කෙටි කාල අවකාශයක් ලබාදෙන්න. අපි ඔබගේ කැඳවීමට ප්‍රතිචාර දක්වන්නෙමු. තවද දූතයින්ව අනුගමනය කරන්නෙමු'යි කියන්නෝය. 'නුඹලාට පිරිහීමක් නොවන බව නුඹලා කලින් දිවුරා නොකිව්වෙහුද?'

وَاَنْذِرِ النَّاسَ يَوْمَ يَاْتِيْهِمُ الْعَذَابُ فَيَقُوْلُ الَّذِيْنَ ظَلَمُوْا رَبَّنَآ اَخِّرْنَآ اِلٰٓى اَجَلٍ قَرِيْبٍ ۙ نُّجِبْ دَعْوَتَكَ وَنَتَّبِعِ الرُّسُلَ ؕ اَوَلَمْ تَكُوْنُوْٓا اَقْسَمْتُمْ مِّنْ قَبْلُ مَا لَكُمْ مِّنْ زَوَالٍ ۙ﴿٤٥﴾

46. 'තවද තමන්ටම වරද කරගත්තවුන් වෙසෙන වාසස්ථානවල නුඹලාද විසූහ. තවද අප ඔවුන් සම්බන්ධයෙන් කෙසේ කටයුතු කළේදැයි නුඹලාට පැහැදිලි වී ඇත. තවද අපි නුඹලාට (පැහැදිලි) උපමාවන් ගෙනහැර දැක්වූයෙමු.'

وَّسَكَنْتُمْ فِيْ مَسٰكِنِ الَّذِيْنَ ظَلَمُوْٓا اَنْفُسَهُمْ وَتَبَيَّنَ لَكُمْ كَيْفَ فَعَلْنَا بِهِمْ وَضَرَبْنَا لَكُمُ الْاَمْثَالَ ﴿٤٦﴾

47. තවද ඔවුනට කළහැකි කුමක් හෝ උපායක් ඔවුන් යෙදූහ. නමුත් ඔවුන්ගේ උපායේ (ප්‍රතිඵලය) අල්ලාහ් වෙතය. කඳු සෙලවීමට තරම් ඔවුන්ගේ උපාය බලගතු වුවද.

وَقَدْ مَكَرُوْا مَكْرَهُمْ وَعِنْدَ اللّٰهِ مَكْرُهُمْ ؕ وَاِنْ كَانَ مَكْرُهُمْ لِتَزُوْلَ مِنْهُ الْجِبَالُ ﴿٤٧﴾

48. එබැවින් අල්ලාහ්, ඔහුගේ දූතයින්ට (දුන්) ඔහුගේ පොරොන්දුව කඩ කරන බව නොසිතන්න. නියතවශයෙන්ම අල්ලාහ් බලසම්පන්නය, දඬුවම් දීමට බලය ඇත්තාය.

فَلَا تَحْسَبَنَّ اللّٰهَ مُخْلِفَ وَعْدِهٖ رُسُلَهٗ ؕ اِنَّ اللّٰهَ عَزِيْزٌ ذُو انْتِقَامٍ ؕ﴿٤٨﴾

49. මෙම පොළොව තවත් පොළොවක් බවට වෙනස් කරනු ලබන එම දිනයේදී, එමෙන්ම අහසද. තවද ඔවුන් (සියල්ල) එකම පරම මහෝත්තමයා වූ අල්ලාහ් ඉදිරියේ පෙනී සිටින්නෝය.

يَوْمَ تُبَدَّلُ الْاَرْضُ غَيْرَ الْاَرْضِ وَالسَّمٰوٰتُ وَبَرَزُوْا لِلّٰهِ الْوَاحِدِ الْقَهَّارِ ﴿۴۹﴾

50. තවද එදින වරදකරුවන්ව දම්වැලින් බැඳ දමා තිබීම ඔබ දකිනු ඇත.

وَتَرَى الْمُجْرِمِيْنَ يَوْمَئِذٍ مُّقَرَّنِيْنَ فِي الْاَصْفَادِ ﴿۵۰﴾

51. ඔවුන්ගේ ඇඟළුම් ගල්තාරයෙන් (සාදා) ඇත. තවද ගින්න ඔවුන්ගේ මුහුණු වසන්නේය.

سَرَابِيْلُهُمْ مِّنْ قَطِرَانٍ وَّتَغْشٰى وُجُوْهَهُمُ النَّارُ ﴿۵۱﴾

52. අල්ලාහ් සියළු ආත්මයට එය උපයා ඇති දේ සඳහා ඵලවිපාක දෙනු පිණිස (එය එසේ වන්නේය.) නියතවශයෙන්ම ගණන් ගැනීමෙහි අල්ලාහ් ඉතා සීඝ්‍රය.

لِيَجْزِيَ اللّٰهُ كُلَّ نَفْسٍ مَّا كَسَبَتْ ؕ اِنَّ اللّٰهَ سَرِيْعُ الْحِسَابِ ﴿۵۲﴾

53. මෙය මිනිස් සංහතියට ප්‍රයෝජනය උදෙසා එමගින් ඔවුන් අවවාද ලබනු පිණිසද, ඔහු එකම දෙවියන් පමණක් යැයි ඔවුන් දැනගනු පිණිසද, නුවණැත්තන් අවබෝධයට ගනු පිණිසද දෙනලද ප්‍රකට පණිවිඩයකි.

هٰذَا بَلٰغٌ لِّلنَّاسِ وَلِيُنْذَرُوْا بِهٖ وَلِيَعْلَمُوْٓا اَنَّمَا هُوَ اِلٰهٌ وَّاحِدٌ وَّلِيَذَّكَّرَ اُولُوا الْاَلْبَابِ ﴿۵۳﴾ ع



අල් හිජ්ර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓرٰ تِلۡكَ اٰيٰتُ الۡكِتٰبِ وَقُرۡاٰنٍ مُّبِيۡنٍ ②

2. අලිෆ් ලාම් රා◆ මේවා පුස්තකයේ මෙන්ම පැහැදිලි කුර්ආනයේ වාක්‍යයන් වේ.

رُبَمَا يَوَدُّ الَّذِيۡنَ كَفَرُوۡا لَوۡ كَانُوۡا مُسۡلِمِيۡنَ ③

14-කොටස

3. තමන් මුස්ලිම්වරුන් වී සිටියා නම් යැයි බොහෝවිට අවිශ්වාසිතයින් කැමති වන්නෝය.

ذَرۡهُمۡ يَاۡكُلُوۡا وَيَتَمَتَّعُوۡا وَيُلۡهِهِمُ الۡاَمَلُ فَسَوۡفَ يَعۡلَمُوۡنَ ④

4. ඔවුන් අනුභව කරමින් ඔවුන් ප්‍රීතිවීමටද හිස් අපේක්ෂාව ඔවුන්ව මුළා කිරීමටද ඔවුන්ව ඉඩ හරින්න. නමුත් ඔවුන් ඉක්මණින්ම දැනගන්නෝය.

وَمَاۤ اَهۡلَكۡنَا مِنۡ قَرۡيَةٍ اِلَّا وَلَهَا كِتَابٌ مَّعۡلُوۡمٌ ⑤

5. තවද කිසිවිටෙක කිසිදු නගරයක් එය සඳහා (මීට පෙර) දැනගත් තීරණයකින් තොරව අපි විනාශයට පත් නොකළෙමු.

مَا تَسۡبِقُ مِنۡ اُمَّةٍ اَجَلَهَا وَمَا يَسۡتَاۡخِرُوۡنَ ⑥

6. කිසිම ජනතාවකට තමන්ගේ නියමිත කාලය අභිබවා යා නොහැක. තවද ඔවුන්ට කල් දැමීමටද නොහැක.

وَقَالُوۡا يٰۤاَيُّهَا الَّذِىۡ نُزِّلَ عَلَيۡهِ الذِّكۡرُ اِنَّكَ لَمَجۡنُوۡنٌ ⑦

7. තවද 'ඕ! මෙම අනුශාසනාව පහළ කරනු ලැබුවාණෙනි! නියත වශයෙන්ම ඔබ උම්මත්තකයෙකි'යි ඔවුහු පැවසූහ.

لَوۡ مَا تَاۡتِيۡنَا بِالۡمَلٰۤٮِٕكَةِ اِنۡ كُنۡتَ مِنَ الصّٰدِقِيۡنَ ⑧

8. 'ඔබ සත්‍යවාදීන්ගෙන් නම් ඔබ අප වෙත සුරදූතයින්ව ගෙන නොඑන්නේ මන්ද?'

◆ මම අල්ලාහ්, සියල්ල දකින්නා වෙමි.

مَا نُنَزِّلُ الْمَلٰٓئِكَةَ اِلَّا بِالْحَقِّ وَمَا كَانُوْٓا اِذًا مُّنْظَرِيْنَ ﴿٩﴾

9. අපි සත්‍යය සමග මිස සුරදූතයින්ව පහළ නොකරන්නෙමු. තවද එවිට ඔවුනට (අවිශ්වාසිතයින්ට) අවකාශයක් දෙනු නොලැබේ.

اِنَّا نَحْنُ نَزَّلْنَا الذِّكْرَ وَاِنَّا لَهٗ لَحٰفِظُوْنَ ﴿١٠﴾

10. සැබැවින්ම අපිම මෙම අනුශාසනාව (කුර්ආනය) පහළ කර ඇත්තෙමු. තවද නියතවශයෙන්ම එය ආරක්ෂාකරන්නන් අපිම වන්නෙමු.

وَلَقَدْ اَرْسَلْنَا مِنْ قَبْلِكَ فِيْ شِيَعِ الْاَوَّلِيْنَ ﴿١١﴾

11. තවද අපි ඔබට පෙර කලින් වූ ජනයින්ගේ විවිධ කොටස් අතරට (දූතයින්ව) එව්වෙමු.

وَمَا يَاْتِيْهِمْ مِّنْ رَّسُوْلٍ اِلَّا كَانُوْا بِهٖ يَسْتَهْزِءُوْنَ ﴿١٢﴾

12. තවද ඔවුන් ඔහුට (දූතයාට) සරදම් කළා මිස කිසිම දූතයෙක් ඔවුන් වෙත පැමිණියේ නැත.

كَذٰلِكَ نَسْلُكُهٗ فِيْ قُلُوْبِ الْمُجْرِمِيْنَ ﴿١٣﴾

13. මෙලෙස අපි මෙය (සරදම් කිරීමේ සිරිත) පාපකාරී ජනතාවගේ හදවත් තුලට ඇතුළු කරන්නෙමු.

لَا يُؤْمِنُوْنَ بِهٖ وَقَدْ خَلَتْ سُنَّةُ الْاَوَّلِيْنَ ﴿١٤﴾

14. ඔවුන් මෙය කෙරෙහි විශ්වාස නොකරති. තවද පෙර ජනතාවන්ගේ ක්‍රියා පිළිවෙත ඉකුත්ව ගොස් ඇත.

وَلَوْ فَتَحْنَا عَلَيْهِمْ بَابًا مِّنَ السَّمَآءِ فَظَلُّوْا فِيْهِ يَعْرُجُوْنَ ﴿١٥﴾

15. තවද අපි අහසින් දොරටුවක් ඔවුන් වෙතට විවෘත කර ඔවුන් එමගින් ඉහළට නගිමින් සිටියද,

لَقَالُوْٓا اِنَّمَا سُكِّرَتْ اَبْصَارُنَا بَلْ نَحْنُ قَوْمٌ مَّسْحُوْرُوْنَ ﴿١٦﴾ ع

16. නියතවශයෙන්ම ඔවුන් 'අපගේ ඇස් අඳුරු කරනු ලැබ ඇත. එපමණක් නොව අපි මෝහනය කරනු ලැබූ ජනතාවක් වන්නෙමු'යි කියනු ඇත.

وَلَقَدْ جَعَلْنَا فِي السَّمَآءِ بُرُوْجًا وَّزَيَّنّٰهَا لِلنّٰظِرِيْنَ ﴿١٧﴾

17. සත්තකින්ම අපි අහසෙහි තාරකා මණ්ඩලයන් පිහිටුවා ඇත්තෙමු. තවද බලන අයහට ඒවා අලංකාර කර ඇත්තෙමු.

18. තවද ශාපලත් සියලු ෂෛයිතාන්ගෙන් අපි එය ආරක්ෂාකර ඇත්තෙමු.

وَحَفِظْنٰهَا مِنْ كُلِّ شَيْطٰنٍ رَّجِيْمٍ ﴿١٨﴾

19. නමුත් කිසිවෙක් හොරෙන් ඇහුම්කන් දෙන්නේ නම් දීප්තිමත් ගිනි දැල්ලක් ඔහුව ලුහු බඳියි.

اِلَّا مَنِ اسْتَرَقَ السَّمْعَ فَاَتْبَعَهٗ شِهَابٌ مُّبِيْنٌ ﴿١٩﴾

20. තවද අපි පොළොව ව්‍යාප්ත කොට එහි තිරසාර කඳු පිහිටුවීමු. එමෙන්ම එහි උචිත ප්‍රමාණයට හැමදෙයක්ම වැඩීමට සැලැස්වීමු.

وَالْاَرْضَ مَدَدْنٰهَا وَاَلْقَيْنَا فِيْهَا رَوَاسِيَ وَاَنْۢبَتْنَا فِيْهَا مِنْ كُلِّ شَيْءٍ مَّوْزُوْنٍ ﴿٢٠﴾

21. තවද අපි එහි නුඹලාටත් නුඹලා නඩත්තු නොකරන (සියළු) අයටත් දිවි පෙවතට අවශ්‍ය දේ සලස්වා ඇත්තෙමු.

وَجَعَلْنَا لَكُمْ فِيْهَا مَعَايِشَ وَمَنْ لَّسْتُمْ لَهٗ بِرٰزِقِيْنَ ﴿٢١﴾

22. සියලු දෑහි නිධානයන් අප සතුව මිස නැත. තවද නියමිත ප්‍රමාණයකින් මිස අපි එය පහළ නොකරන්නෙමු.

وَاِنْ مِّنْ شَيْءٍ اِلَّا عِنْدَنَا خَزَآئِنُهٗ وَمَا نُنَزِّلُهٗۤ اِلَّا بِقَدَرٍ مَّعْلُوْمٍ ﴿٢٢﴾

23. තවද අපි උසුලන්නාවූ සුළං එව්වෙමු. පසුව අපි වළාකුලින් ජලය පහළ කළෙමු. පසුව අපි එය නුඹලාට පානය කිරීමට දුන්නෙමු. තවද එය රැස්කර තබාගන්නෝ නුඹලා නොවේ.

وَاَرْسَلْنَا الرِّيٰحَ لَوَاقِحَ فَاَنْزَلْنَا مِنَ السَّمَآءِ مَآءً فَاَسْقَيْنٰكُمُوْهُۚ وَمَاۤ اَنْتُمْ لَهٗ بِخٰزِنِيْنَ ﴿٢٣﴾

24. තවද සැබැවින්ම අපිම ජීවය ලබාදෙන්නෙමු. තවද අපිම මරණය පමුණුවන්නෙමු. තවද (එකම) උරුමක්කාරයෝ අපිම වෙමු.

وَاِنَّا لَنَحْنُ نُحْيٖ وَنُمِيْتُ وَنَحْنُ الْوٰرِثُوْنَ ﴿٢٤﴾

25. තවද නුඹලා අතුරින් පෙරට යන්නන්ව අපි දනිමු. තවද පසුබටවන්නන්වද අපි දනිමු.

وَلَقَدْ عَلِمْنَا الْمُسْتَقْدِمِيْنَ مِنْكُمْ وَلَقَدْ عَلِمْنَا الْمُسْتَاْخِرِيْنَ ﴿٢٥﴾

26. තවද නියතවශයෙන්ම ඔවුන්ව එක්රැස් කරනුයේ ඔබගේ අධිපතියාණන්ය. නියතවශයෙන්ම ඔහු ප්‍රඥාසම්පන්නය, සියල්ල දත්තාය.

وَاِنَّ رَبَّكَ هُوَ يَحْشُرُهُمْؕ اِنَّهٗ حَكِيْمٌ عَلِيْمٌ ﴿٢٦﴾

وَلَقَدۡ خَلَقۡنَا الۡاِنۡسَانَ مِنۡ صَلۡصَالٍ مِّنۡ حَمَاٍ مَّسۡنُوۡنٍ ۚ﴿۲۷﴾

27. තවද, පල්වූ මඩින් (හැඩගැන්වූ) හඬනගන වියළි මැටියෙන් නියතවශයෙන්ම අපි මිනිසාව මැව්වෙමු.

وَالۡجَآنَّ خَلَقۡنٰهُ مِنۡ قَبۡلُ مِنۡ نَّارِ السَّمُوۡمِ ﴿۲۸﴾

28. තවද, මෙයට පෙර අපි දැවෙන සුළඟේ ගින්නෙන් ජින්වරුන්ව මවා ඇත්තෙමු.

وَاِذۡ قَالَ رَبُّكَ لِلۡمَلٰٓٮِٕكَةِ اِنِّىۡ خَالِـقٌۢ بَشَرًا مِّنۡ صَلۡصَالٍ مِّنۡ حَمَاٍ مَّسۡنُوۡنٍ ﴿۲۹﴾

29. 'තවද, කළු මඩින් හැඩගැන්වූ හඬනගන වියළි මැටියෙන් මා මිනිසාව මවන්නට යමි'යි ඔබගේ අධිපතියාණන් සුරදූතයින්ට පැවසූ අවස්ථාව (සිහිපත් කරන්න).

فَاِذَا سَوَّيۡتُهٗ وَنَفَخۡتُ فِيۡهِ مِنۡ رُّوۡحِىۡ فَقَعُوۡا لَهٗ سٰجِدِيۡنَ ﴿۳۰﴾

30. 'පසුව මා ඔහුව (අංග සම්පූර්ණව) හැඩගන්වා ඔහු තුළ මාගේ ආත්මය පිඹුනු කල්හි, නුඹලා ඔහුට අවනත වනු'

فَسَجَدَ الۡمَلٰٓٮِٕكَةُ كُلُّهُمۡ اَجۡمَعُوۡنَ ۙ﴿۳۱﴾

31. එහෙයින් සුරදූතයෝ සියල්ලෝම අවනත වූහ.

اِلَّاۤ اِبۡلِيۡسَ ؕ اَبٰٓى اَنۡ يَّكُوۡنَ مَعَ السّٰجِدِيۡنَ ﴿۳۲﴾

32. ඉබ්ලීස් හැරය, අවනත වන්නන් සමග වීමට ඔහු ප්‍රතික්ෂේප කළේය.

قَالَ يٰۤاِبۡلِيۡسُ مَا لَكَ اَلَّا تَكُوۡنَ مَعَ السّٰجِدِيۡنَ ﴿۳۳﴾

33. 'එම්බා ඉබ්ලීස්, නුඹ අවනත වන්නන් සමග නොවීමට නුඹට සිදුවී ඇත්තේ කුමක්දැ?'යි (දෙවියන්) පැවසීය.

قَالَ لَمۡ اَكُنۡ لِّاَسۡجُدَ لِبَشَرٍ خَلَقۡتَهٗ مِنۡ صَلۡصَالٍ مِّنۡ حَمَاٍ مَّسۡنُوۡنٍ ﴿۳۴﴾

34. 'කළු මඩින් සැකසුනු හඬනගන වියලි මැටියෙන් ඔබ මැවූ මිනිසාට මම අවනත නොවෙමි'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالَ فَاخۡرُجۡ مِنۡهَا فَاِنَّكَ رَجِيۡمٌ ۙ﴿۳۵﴾

35. 'එසේනම් මෙතැනින් පිටව යනු, නියතවශයෙන්ම නුඹ ශාප ලද්දෙකි'යි (දෙවියන්) පැවසීය.

وَّاِنَّ عَلَيۡكَ اللَّعۡنَةَ اِلٰى يَوۡمِ الدِّيۡنِ ﴿۳۶﴾

36. 'තවද, විනිශ්චය දිනය දක්වා (මාගේ) ශාපය නියතවශයෙන්ම නුඹ මත වනු ඇත'.

37. 'මාගේ අධිපතියාණෙනි! එසේ නම්, ඔවුන් නැගිටුවනු ලබන දිනය තෙක් මට කාල අවකාශයක් ලබා දෙන්නැ' යි ඔහු කීවේය.

قَالَ رَبِّ فَاَنۡظِرۡنِىۡۤ اِلٰى يَوۡمِ يُبۡعَثُوۡنَ ﴿۳۷﴾

38. 'නුඹ කාල අවකාශය දෙන ලද්දවුන්ගෙන් යැ'යි (දෙවියන්) පැවසීය.

قَالَ فَاِنَّكَ مِنَ الۡمُنۡظَرِيۡنَ ۙ ﴿۳۸﴾

39. 'නියමිත කාලයේ එම දිනය දක්වා'.

اِلٰى يَوۡمِ الۡوَقۡتِ الۡمَعۡلُوۡمِ ﴿۳۹﴾

40. ඔහු 'මාගේ අධිපතියාණෙනි! ඔබ මා නොමග ගිය ලෙස තීන්දු කර ඇති බැවින් නියතවශයෙන්ම පොළොව මත ඔවුනට (නපුර) අලංකාරව (පෙනෙන්නට) මම සලස්වන්නෙමි. තවද මම නියතවශයෙන්ම ඔවුන් සියල්ලන්ව නොමග යවන්නෙමි'යි පිළිතුරු දුන්නේය,

قَالَ رَبِّ بِمَاۤ اَغۡوَيۡتَنِىۡ لَاُزَيِّنَنَّ لَهُمۡ فِى الۡاَرۡضِ وَلَاُغۡوِيَنَّهُمۡ اَجۡمَعِيۡنَ ۙ ﴿۴۰﴾

41. 'ඔවුන් අතුරින් තෝරාගනු ලැබූ ඔබගේ දාසයින් හැරෙන්නට'.

اِلَّا عِبَادَكَ مِنۡهُمُ الۡمُخۡلَصِيۡنَ ﴿۴۱﴾

42. (දෙවියන්) 'මා වෙත (යොමුවන) සෘජු මාර්ගය මෙය වේ යැ'යි පැවසීය.

قَالَ هٰذَا صِرَاطٌ عَلَىَّ مُسۡتَقِيۡمٌ ﴿۴۲﴾

43. 'නුඹව අනුගමනය කරන එවන් නොමග යන්නන් හැරෙන්නට නියතවශයෙන්ම මාගේ දාසයින් කෙරෙහි නුඹට කිසිදු බලයක් නැත'.

اِنَّ عِبَادِىۡ لَيۡسَ لَكَ عَلَيۡهِمۡ سُلۡطٰنٌ اِلَّا مَنِ اتَّبَعَكَ مِنَ الۡغٰوِيۡنَ ﴿۴۳﴾

44. තවද නියතවශයෙන්ම ඔවුන් සියල්ලන් සඳහා පොරොන්දු වූ ස්ථානය නිරය වේ.

وَاِنَّ جَهَنَّمَ لَمَوۡعِدُهُمۡ اَجۡمَعِيۡنَ ۙ ﴿۴۴﴾

45. එහි දොරටු හතක් ඇත. (තවද) ඔවුන්ගෙන් කොටසක් හැම දොරටුවකටම වෙන්කොට ඇත.

لَهَا سَبۡعَةُ اَبۡوَابٍ ؕ لِكُلِّ بَابٍ مِّنۡهُمۡ جُزۡءٌ مَّقۡسُوۡمٌ ﴿۴۵﴾ ع

46. සැබැවින්ම බිය බැතිමත් අය උද්‍යානයන්හි සහ දිය උල්පත්හි සිටින්නෝය.

اِنَّ الۡمُتَّقِيۡنَ فِىۡ جَنّٰتٍ وَّعُيُوۡنٍ ؕ ﴿۴۶﴾

اُدْخُلُوْهَا بِسَلٰمٍ اٰمِنِيْنَ ﴿٤٧﴾

47. 'සාමයෙන් යුතුව ආරක්ෂිතව එහි ඇතුළුවනු'.

وَنَزَعْنَا مَا فِيْ صُدُوْرِهِمْ مِّنْ غِلٍّ اِخْوَانًا عَلٰى سُرُرٍ مُّتَقٰبِلِيْنَ ﴿٤٨﴾

48. තවද ඔවුන්ගේ හදවත් තුළ තිබෙන ද්වේශය අපි ඉවත් කරන්නෙමු. (ඔවුන්) සහෝදරයන් ලෙස එකිනෙකාට මුහුණලා යහන් මත සිටින්නෝය.

لَا يَمَسُّهُمْ فِيْهَا نَصَبٌ وَّمَا هُمْ مِّنْهَا بِمُخْرَجِيْنَ ﴿٤٩﴾

49. එහිදී ඔවුන්ව වෙහෙට්ටුව වෙලා නොගනී. එමෙන්ම ඔවුන් (කිසිවිටකත්) එයින් පිටකරනු ලබන්නෝද නොවෙති.

نَبِّئْ عِبَادِيْٓ اَنِّيْٓ اَنَا الْغَفُوْرُ الرَّحِيْمُ ﴿٥٠﴾

50. ඇත්තෙන්ම මා අතිශයින් ක්ෂමාන්විතද පරම දයාබරද බව මාගේ දාසයින්ට දන්වන්න.

وَاَنَّ عَذَابِيْ هُوَ الْعَذَابُ الْاَلِيْمُ ﴿٥١﴾

51. එමෙන්ම ඉතාමත් වේදනීය දඬුවම මාගේ දඬුවම වේ.

وَنَبِّئْهُمْ عَنْ ضَيْفِ اِبْرٰهِيْمَ ﴿٥٢﴾

52. තවද ඉබ්රාහිම්ගේ ආගන්තුකයින් ගැන ඔවුනට දැනුම් දෙන්න.

اِذْ دَخَلُوْا عَلَيْهِ فَقَالُوْا سَلٰمًا ۗ قَالَ اِنَّا مِنْكُمْ وَجِلُوْنَ ﴿٥٣﴾

53. ඔවුන් ඔහු වෙත පැමිණි විට 'සාමය' යැයි පැවසුවෝය. ඔහු 'ඔබලාට අපි බිය වන්නෙමු'යි පිළිතුරු දුන්නේය.

قَالُوْا لَا تَوْجَلْ اِنَّا نُبَشِّرُكَ بِغُلٰمٍ عَلِيْمٍ ﴿٥٤﴾

54. ඔවුහු 'බිය නොවන්න. නැණවත් පුතෙකු ගැන අපි ඔබට සුභාරංචි දෙන්නෙමු'යි කීහ.

قَالَ اَبَشَّرْتُمُوْنِيْ عَلٰٓى اَنْ مَّسَّنِيَ الْكِبَرُ فَبِمَ تُبَشِّرُوْنَ ﴿٥٥﴾

55. ඔහු 'මහළුවිය මා වෙළාගෙන තිබියදීත්, ඔබලා ශුභාරංචි මට දෙන්නේද? එසේනම් ඔබලා මට ශුභාරංචි දෙන්නේ කුමක් පදනම් කොටගෙනදැ'යි කීවේය.

قَالُوْا بَشَّرْنٰكَ بِالْحَقِّ فَلَا تَكُنْ مِّنَ الْقٰنِطِيْنَ ﴿٥٦﴾

56. 'අපි ඔබට සත්‍යයෙන් යුතු සුභාරංචි දී ඇත්තෙමු. එබැවින් බලාපොරොත්තු සුන්වූවන්ගෙන් නොවන්නැ'යි ඔවුහු කීවෝය.

قَالَ وَمَنْ يَّقْنَطُ مِنْ رَّحْمَةِ رَبِّهٖٓ اِلَّا الضَّآلُّوْنَ ۝٥٧

57. ඔහු 'තවද තම අධිපතියාණන්ගේ දයාව පිළිබඳ බලාපොරොත්තු සුන් කරගන්නේ නොමග ගියවුන් මිස අන් කවරෙක්දැ?'යි කීවේය.

قَالَ فَمَا خَطْبُكُمْ اَيُّهَا الْمُرْسَلُوْنَ ۝٥٨

58. ඔහු 'එම්බල දූතයිනි (දැන්) නුඹලාගේ කාර්යය කුමක් වේද?'යි පැවසුවේය.

قَالُوْٓا اِنَّآ اُرْسِلْنَآ اِلٰى قَوْمٍ مُّجْرِمِيْنَ ۙ۝٥٩

59. ඔවුහු 'වරදකරුවන් වූ ජනතාවක් වෙත අපි එවන ලද්දෙමු'යි පැවසූහ.

اِلَّآ اٰلَ لُوْطٍ ؕ اِنَّا لَمُنَجُّوْهُمْ اَجْمَعِيْنَ ۙ۝٦٠

60. 'ලූත්ගේ අනුගාමිකයින් හැරෙන්නටය. ඔවුන්(ලූත්ගේ අනුගාමිකයින්) සියල්ලන්ව අපි ගලවා ගන්නෙමු.

اِلَّا امْرَاَتَهٗ قَدَّرْنَآ ۙ اِنَّهَا لَمِنَ الْغٰبِرِيْنَ ۝٦١

61. ඔහුගේ බිරිය හැරෙන්නටය. නියතවශයෙන්ම ඇය පසුබසින්නන්ගෙන් යැයි අපි තීරණය කළෙමු'.

فَلَمَّا جَآءَ اٰلَ لُوْطِ ِۨ الْمُرْسَلُوْنَ ۙ۝٦٢

62. තවද දූතයින් ලූත්ගේ ජනතාව වෙත පැමිණි විට,

قَالَ اِنَّكُمْ قَوْمٌ مُّنْكَرُوْنَ ۝٦٣

63. 'ඇත්තෙන්ම ඔබලා නාඳුනන පිරිසක්යැ'යි ඔහු(ලූත්) කීවේය.

قَالُوْا بَلْ جِئْنٰكَ بِمَا كَانُوْا فِيْهِ يَمْتَرُوْنَ ۝٦٤

64. 'නොඑසේය, ඔවුන් සැකයෙන් පසුවන ඒ (පුවත) සමගින් අපි ඔබ වෙත පැමිණ ඇත්තෙමු'යි ඔවුහු කීහ.

وَاَتَيْنٰكَ بِالْحَقِّ وَاِنَّا لَصٰدِقُوْنَ ۝٦٥

65. 'තවද අපි සත්‍යය සමගින් ඔබ වෙත පැමිණ ඇත්තෙමු. නියතවශයෙන්ම අපි සත්‍යවාදීන් වන්නෙමු.'

فَاَسْرِ بِاَهْلِكَ بِقِطْعٍ مِّنَ الَّيْلِ وَاتَّبِعْ اَدْبَارَهُمْ وَلَا يَلْتَفِتْ مِنْكُمْ اَحَدٌ وَّامْضُوْا حَيْثُ تُؤْمَرُوْنَ ۝٦٦

66. 'එමනිසා රාත්‍රි (අග)භාගයේදී ඔබගේ පවුලේ අය සමග පිට වී යන්න. ඔබ ඔවුන්ගේ පිටු පසින් ගමන් කරන්න. තවද නුඹලාගෙන් කිසිවෙකු ආපසු නොබැලිය යුතුය. (දැන්) නුඹලාට අණ කරන ලද ස්ථානය කරා පිටත්වනු.'

| | |
|---|---|
| 67. තවද උදෑසන වන විට අපි ඔවුන්ව මුලිනුපුටා දමනු ලබන්නේයැයි ඔහුට දැන්වූයෙමු. | وَقَضَيْنَآ إِلَيْهِ ذَٰلِكَ ٱلْأَمْرَ أَنَّ دَابِرَ هَٰٓؤُلَآءِ مَقْطُوعٌ مُّصْبِحِينَ ﴿٦٧﴾ |
| 68. තවද නගරයේ ජනතාව ප්‍රීති වෙමින් පැමිණියහ. | وَجَآءَ أَهْلُ ٱلْمَدِينَةِ يَسْتَبْشِرُونَ ﴿٦٨﴾ |
| 69. 'මොවුහු මාගේ අගන්තුකයින් වෙති. එබැවින් මා ලැජ්ජාවට පත් නොකරනු'යි ඔහු කීය. | قَالَ إِنَّ هَٰٓؤُلَآءِ ضَيْفِى فَلَا تَفْضَحُونِ ﴿٦٩﴾ |
| 70. 'තවද අල්ලාහ් කෙරෙහි බිය දක්වනු. තවද මා අවමානයට පත් නොකරනු.' | وَٱتَّقُوا۟ ٱللَّهَ وَلَا تُخْزُونِ ﴿٧٠﴾ |
| 71. ඔවුහු '(අන්‍යයන් වන) සියළු ජනතාවට (සත්කාර කිරීමෙන්) අප ඔබව වැළැක්වූවේ නැද්දැ?'යි කීහ. | قَالُوٓا۟ أَوَلَمْ نَنْهَكَ عَنِ ٱلْعَٰلَمِينَ ﴿٧١﴾ |
| 72. ඔහු 'නුඹලා කිසිවක් කිරීමට තැත් කරන්නේ නම් (නුඹලාට පතිවත්දම් රකින්නන් වන) මේ මාගේ දියණියන්ය (මොවුන් ගැන නුඹලා ලැජ්ජා වනු)'යි කීවේය. | قَالَ هَٰٓؤُلَآءِ بَنَاتِىٓ إِن كُنتُمْ فَٰعِلِينَ ﴿٧٢﴾ |
| 73. ඔබගේ ජීවිතයේ නාමයෙන්, නියතවශයෙන්ම ඔවුහු ඔවුන්ගේ මත්වීමෙහි අයාලේ හැසිරෙති. | لَعَمْرُكَ إِنَّهُمْ لَفِى سَكْرَتِهِمْ يَعْمَهُونَ ﴿٧٣﴾ |
| 74. හිරු උදාවත් සමග එම දඬුවම ඔවුන්ව හසුකරගත්තේය. | فَأَخَذَتْهُمُ ٱلصَّيْحَةُ مُشْرِقِينَ ﴿٧٤﴾ |
| 75. අපි එය (නගරය) උඩු යටිකුරු කළෙමු. තවද අපි ඔවුන් මත මැටි ගල් වර්ෂාවක් වැස්සවීමු. | فَجَعَلْنَا عَٰلِيَهَا سَافِلَهَا وَأَمْطَرْنَا عَلَيْهِمْ حِجَارَةً مِّن سِجِّيلٍ ﴿٧٥﴾ |
| 76. නියතවශයෙන්ම අධ්‍යයනය කරන්නන් හට මෙහි සලකුණු ඇත. | إِنَّ فِى ذَٰلِكَ لَءَايَٰتٍ لِّلْمُتَوَسِّمِينَ ﴿٧٦﴾ |
| 77. තවද (තවමත්) එය ස්ථිර ප්‍රධාන මාර්ගයක තිබේ. | وَإِنَّهَا لَبِسَبِيلٍ مُّقِيمٍ ﴿٧٧﴾ |
| 78. නියතවශයෙන්ම විශ්වාසිතයින් හට මෙහි සලකුණක් ඇත. | إِنَّ فِى ذَٰلِكَ لَءَايَةً لِّلْمُؤْمِنِينَ ﴿٧٨﴾ |

79. තවද අයිකා (ඝන වෘක්ෂ ආශ්‍රිත)වාසීන්ද නියතවශයෙන්ම වරදකරුවන් වූහ.

وَاِنْ كَانَ اَصْحٰبُ الْاَيْكَةِ لَظٰلِمِيْنَ ۙ﴿۷۹﴾

80. එබැවින් අපි ඔවුන්ටද දඬුවම් දුනිමු. තවද ඒ (නගර) දෙකම මහා මාර්ගයන්හි තිබේ.

فَانْتَقَمْنَا مِنْهُمْ ۘ وَاِنَّهُمَا لَبِاِمَامٍ مُّبِيْنٍ ﴿۸۰﴾

81. තවද හිජ්ර්හි ජනතාව(ද) දූතයින්ව මුසාවාදීන් ලෙස සැළකූහ.

وَلَقَدْ كَذَّبَ اَصْحٰبُ الْحِجْرِ الْمُرْسَلِيْنَ ۙ﴿۸۱﴾

82. තවද අපි අපගේ සලකුණු ඔවුනට දුනිමු. එහෙත් ඔවුහු ඊට පිටුපෑහ.

وَاٰتَيْنٰهُمْ اٰيٰتِنَا فَكَانُوْا عَنْهَا مُعْرِضِيْنَ ۙ﴿۸۲﴾

83. තවද ආරක්ෂාව පතා ඔවුහු කඳු කපා ගෙවල් සාදාගෙන සිටියහ.

وَكَانُوْا يَنْحِتُوْنَ مِنَ الْجِبَالِ بُيُوْتًا اٰمِنِيْنَ ﴿۸۳﴾

84. එහෙත් උදෑසන වන විටදී දඬුවම ඔවුන්ව හසුකරගත්තේය.

فَاَخَذَتْهُمُ الصَّيْحَةُ مُصْبِحِيْنَ ۙ﴿۸۴﴾

85. එමෙන්ම ඔවුන් ඉපැයූ සියළු දේවල් ඔවුනට ඵලක් නොවිය.

فَمَآ اَغْنٰى عَنْهُمْ مَّا كَانُوْا يَكْسِبُوْنَ ؕ﴿۸۵﴾

86. තවද අහස්ද පොළොවද, ඒ දෙක අතර වන දේද සත්‍යය සමගින් මිස අප මැව්වේ නැත. තවද එම හෝරාව නියතවශයෙන්ම පැමිණෙන්නේය. එබැවින් උතුම් ක්‍රියාපිළිවෙතින් (ඔවුන්ගෙන්) ඉවත් වන්න.

وَمَا خَلَقْنَا السَّمٰوٰتِ وَالْاَرْضَ وَمَا بَيْنَهُمَآ اِلَّا بِالْحَقِّ ؕ وَاِنَّ السَّاعَةَ لَاٰتِيَةٌ فَاصْفَحِ الصَّفْحَ الْجَمِيْلَ ﴿۸۶﴾

87. සැබැවින්ම ඔබගේ අධිපතියාණන්ම ශ්‍රේෂ්ඨ මැවුම් කරුවාණන්ද, සියල්ල දත්තාද වේ.

اِنَّ رَبَّكَ هُوَ الْخَلّٰقُ الْعَلِيْمُ ﴿۸۷﴾

88. නිතර නිතර පාරායනය කරන (වාක්‍යයන්) සතක්ද, ශ්‍රේෂ්ඨ කුර්ආනයද අපි ඔබට ඇත්තෙන්ම දුනිමු.

وَلَقَدْ اٰتَيْنٰكَ سَبْعًا مِّنَ الْمَثَانِيْ وَالْقُرْاٰنَ الْعَظِيْمَ ﴿۸۸﴾

89. අපි ඔවුනතුරින් ඇතැම් කොටස්වලට ලබාදී ඇති තාවකාලික

لَا تَمُدَّنَّ عَيْنَيْكَ اِلٰى مَا مَتَّعْنَا بِهٖۤ

اَزْوَاجًا مِّنْهُمْ وَلَا تَحْزَنْ عَلَيْهِمْ وَاخْفِضْ جَنَاحَكَ لِلْمُؤْمِنِيْنَ ﴿٨٩﴾

සැපත දෙස ඔබගේ දෑස් යොමු නොකරන්න. තවද ඔවුන් වෙනුවෙන් ශෝක නොවන්න. තවද ඔබගේ (කරුණාවේ) පියාපත් විශ්වාසිතයින් වෙත පහත් කරන්න.

وَقُلْ اِنِّيْٓ اَنَا النَّذِيْرُ الْمُبِيْنُ ﴿٩٠﴾

90. තවද 'ඇත්තෙන්ම මම, ප්‍රත්‍යක්ෂ අවවාද කරන්නෙක් වෙමි'යි පවසන්න.

كَمَآ اَنْزَلْنَا عَلَى الْمُقْتَسِمِيْنَ ﴿٩١﴾

91. එලෙස භේද බින්න වී සිටින්නන්ටද අපි (දඬුවමක්) පහළ කළෙමු.

الَّذِيْنَ جَعَلُوا الْقُرْاٰنَ عِضِيْنَ ﴿٩٢﴾

*92. (එමෙන්ම) කුර්ආනය කොටස්වලට වෙන් කළ අයටද.

فَوَرَبِّكَ لَنَسْـَٔلَنَّهُمْ اَجْمَعِيْنَ ﴿٩٣﴾

93. ඔබගේ අධිපතියාණන්ගේ නාමයෙන්, නියතවශයෙන්ම අපි ඔවුන් සියල්ලන්ගෙන් ප්‍රශ්න කරන්නෙමු.

---

*සටහන. 92: මෙම වාක්‍යයෙහි මුස්ලිම්වරුන් සඳහා දැඩි අවවාදයක් තිබෙන බව අප සළකන හෙයින් මෙම වාක්‍යයන් අතීත කාලයට නොව අනාගත කාලයට පරිවර්තනය කිරීමට කැමැත්තෙමු. මෙහිදී අනාගතය පෙන්වාදීම සඳහා අතීත කාලය භාවිතා කර තිබීම මචිතයට කරුණක් නොවේ. මන්දයත් ස්ථිර වශයෙන්ම ඉටුවිය යුතු මෙවැනි බොහෝ අනාවැකි ශුද්ධ කුර්ආනයෙහි අතීත කාල පදයෙන් ප්‍රකාශ වී ඇත. අතීතය වෙනස් කළ නොහැකිය. අතීත කාල පදයෙන් යුත් අනාවැකි ස්ථිරභාවය තහවුරු කරයි. එම නිසා මෙහි පරිවර්ථනය පහත දැක්වෙන පරිදි විය යුතුය.

"තවද නිතර නිතර පාරායණය කරන (වාක්‍යයන්) සතක්ද, ශ්‍රේෂ්ඨ කුර්ආනයද අපි ඔබට ඇත්තෙන්ම දුනිමු. අපි ඔවුනතුරින් ඇතැම් කොටස්වලට ලබාදී ඇති තාවකාලික සැපත දෙස ඔබගේ දෑස් යොමු නොකරන්න. තවද ඔවුන් වෙනුවෙන් ශෝක නොවන්න. තවද ඔබගේ (කරුණාවේ) පියාපත් විශ්වාසිතයින් වෙත පහත් කරන්න. තවද ඇත්තෙන්ම 'මම, ප්‍රත්‍යක්ෂ අවවාද කරන්නෙක් වෙමි'යි පවසන්න. එලෙස භේද බින්න වී සිටින්නන්ටද අපි (දඬුවමක්) පහළ කළෙමු. තවද ඔවුන් කුර්ආනය කොටස්වලට වෙන් කරන්නෝය". (වාක්‍යය 88 සිට 92)

මුල සිටම මහත්වූ ග්‍රන්ථයක් ලෙස ශුද්ධ කුර්ආනයේ ප්‍රබෝධමත් හඳුන්වාදීමක් සමග මීට පෙර වූ වාක්‍යයන් අප ගවේෂණය කිරීමේදීද, මේ වාක්‍යයන්හි අඩංගු දේ අප සලකා බැලීමේදීද මෙම පරිවර්ථනය ඉතා උචිත යැයි සනාථ වේ. එබැවින් කුර්ආනයට මුළුමනින්ම අවනත වන්නන් යැයි පවසන සියල්ලෝම එහි මූලික පදනම වන එකමුතුභාවයේ පණිවිඩය නොසලකා හරින අතර තම තමන්ගේ පරිවර්ථනය නිවැරදි යැයි ඔප්පු කිරීම සඳහා කොටස් වලට බෙදී අවසානයේදී කුර්ආනය ඇත්තෙන්ම කොටස්වලට වෙන් කරති. එක් එක් පිරිස් සමහර වාක්‍යයන් ඔවුන්ගේ වාසිය තකා අර්ථ දක්වමින් එයට ඇලී ගැලී සිටිති. එසේම අනෙක් පිරිස්ද තවත් සමහර වාක්‍යයන් ඔවුන්ගේ වාසිය තකා ඒවාට අර්ථ දක්වමින් එයට ඇලී ගැලී සිටිති. මෙම බෙදීම්වල අවසානය කෙතරම් තියුණු යැයි කිවහොත් මෙම සටන්වදින කල්ලි අතර එකඟතාවයකට එළැඹීමට කිසිම ඉඩක් නැත. එකම ධර්මයේ ජනසමූහය (උම්මත්) කොටස් වලට බෙදී කුර්ආනයද කොටස් කිරීමට මෙය තුඩු දෙයි.

| | |
|---|---|
| 94. ඔවුන් කරමින් සිටි දේ සම්බන්ධයෙන්, | عَمَّا كَانُوا يَعْمَلُونَ ﴿٩٤﴾ |
| 95. එබැවින් ඔබට අණ කරන ලද දේ විවෘතව ප්‍රකාශ කරන්න. එමෙන්ම (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් ඈත් වන්න. | فَاصْدَعْ بِمَا تُؤْمَرُ وَأَعْرِضْ عَنِ الْمُشْرِكِينَ ﴿٩٥﴾ |
| 96. නියතවශයෙන්ම සරදම් කරන්නන්ට එරෙහිව අප ඔබට ප්‍රමාණවත්ය. | إِنَّا كَفَيْنَاكَ الْمُسْتَهْزِئِينَ ﴿٩٦﴾ |
| 97. ඔවුහු කවුරුන්ද නම් අල්ලාහ් වෙනුවට තවත් දෙවියෙකු ඇති කළ අය වෙති. එහෙත් ඔවුහු ඉක්මණින්ම දැනගන්නෝය. | الَّذِينَ يَجْعَلُونَ مَعَ اللَّهِ إِلَٰهًا آخَرَ ۚ فَسَوْفَ يَعْلَمُونَ ﴿٩٧﴾ |
| 98. තවද ඔවුන් පවසන දේ නිසා ඔබගේ සිත අපහසුතාවයකට පත්වන බව ඇත්තෙන්ම අපි දනිමු. | وَلَقَدْ نَعْلَمُ أَنَّكَ يَضِيقُ صَدْرُكَ بِمَا يَقُولُونَ ﴿٩٨﴾ |
| 99. එහෙයින් ඔබ අධිපතියාණන්ව ප්‍රසංශා කරමින් සුවිශුද්ධ කරන්න. තවද (ඔහු ඉදිරියේ) නමස්කාර කරන්නන්ගෙන් කෙනෙකු වන්න. | فَسَبِّحْ بِحَمْدِ رَبِّكَ وَكُن مِّنَ السَّاجِدِينَ ﴿٩٩﴾ |
| 100. තවද මරණය ඔබ වෙත පැමිණෙන තෙක් ඔබගේ අධිපතියාණන්ට නැමදුම් කරමින් සිටින්න. | وَاعْبُدْ رَبَّكَ حَتَّىٰ يَأْتِيَكَ الْيَقِينُ ﴿١٠٠﴾ |



අන් නහ්ල්
(මක්කාහිදී පහළ වුවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِیۡمِ ١

2. අල්ලාහ්ගේ නියමය පැමිණෙන්නේමය. එබැවින් එය ඉක්මන් කිරීමට උත්සාහ නොකරනු. ඔහු සුවිශුද්ධය. එමෙන්ම ඔවුන් (ඔහුට) සමාන තබන දේට වඩා (ඔහු) අති උසස්ය.

اَتٰۤى اَمۡرُ اللّٰهِ فَلَا تَسۡتَعۡجِلُوۡهُ ؕ سُبۡحٰنَهٗ وَتَعٰلٰى عَمَّا یُشۡرِکُوۡنَ ٢

3. 'මා හැරෙන්නට නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නොමැත. එබැවින් මා හට පමණක් බියබැතිමත් වන ලෙස (ජනතාවට) අවවාද කරනු' යන අනාවරණය සමග ඔහුගේ දාසයින්ගෙන් ඔහු කැමති අයට ඔහුගේ විධානයෙන් ඔහු සුරදූතයින්ව පහළ කරන්නේය.

یُنَزِّلُ الۡمَلٰٓئِکَةَ بِالرُّوۡحِ مِنۡ اَمۡرِهٖ عَلٰى مَنۡ یَّشَآءُ مِنۡ عِبَادِهٖۤ اَنۡ اَنۡذِرُوۡۤا اَنَّهٗ لَاۤ اِلٰهَ اِلَّاۤ اَنَا فَاتَّقُوۡنِ ٣

4. ඔහු අහස් සහ පොළොව සත්‍යය සමග මැව්වේය. ඔවුන් (ඔහුට) සමාන තබන දේට වඩා (ඔහු) අති උසස්ය.

خَلَقَ السَّمٰوٰتِ وَالۡاَرۡضَ بِالۡحَقِّ ؕ تَعٰلٰى عَمَّا یُشۡرِکُوۡنَ ٤

5. ඔහු තරල බිඳුවකින් මිනිසාව මවා ඇත. එහෙත් බලනු! ඔහු (මිනිසා) එළිපිට තර්ක කරන්නෙකු බවට පත් වී ඇත.

خَلَقَ الۡاِنۡسَانَ مِنۡ نُّطۡفَةٍ فَاِذَا هُوَ خَصِیۡمٌ مُّبِیۡنٌ ٥

6. එමෙන්ම ඔහු ගවසතුන්ද මවා ඇත. උන්ගෙන් උණුසුම හා වෙනත් ප්‍රයෝජන බොහොමයක් නුඹලාට ඇත. තවද නුඹලා උන්ගෙන් සමහරෙකුව අනුභව කරන්නෙහුය.

وَالۡاَنۡعَامَ خَلَقَهَا ۚ لَکُمۡ فِیۡهَا دِفۡءٌ وَّمَنَافِعُ وَمِنۡهَا تَاۡکُلُوۡنَ ٦

7. තවද නුඹලා (උන්ව) සවස් යාමයෙහි දක්කාගෙන එන විටද නුඹලා (උන්ව) උදෑසන තණ කෑමට දක්කාගෙන යන විටද නුඹලාට එහි අලංකාරය ඇත.

وَلَکُمۡ فِیۡهَا جَمَالٌ حِیۡنَ تُرِیۡحُوۡنَ وَحِیۡنَ تَسۡرَحُوۡنَ ٧

8. තවද නුඹලාට මහත් පරිශ්‍රමයක් දැරීමෙන් විනා නුඹලාට ලඟාවිය නොහැකි පෙදෙසකට උන් නුඹලාගේ බර උසුලාගෙන යති. නියතවශයෙන්ම නුඹලාගේ අධිපතියාණන් අතිශයින්ම සානුකම්පිතය, පරම දයාබරය.

وَتَحْمِلُ أَثْقَالَكُمْ إِلَىٰ بَلَدٍ لَّمْ تَكُونُوا بَالِغِيهِ إِلَّا بِشِقِّ الْأَنفُسِ ۚ إِنَّ رَبَّكُمْ لَرَءُوفٌ رَّحِيمٌ ﴿٨﴾

9. තවද අශ්වයින්ව කොටළුවන්ව බූරුවන්ව නුඹලා උන්ගේ පිටේ නැග යාම සඳහාද අලංකාරය වශයෙන්ද (ඔහු මවා ඇත). තවද නුඹලා (තවමත්) නොදන්නා දේ ඔහු මවන්නේය.

وَالْخَيْلَ وَالْبِغَالَ وَالْحَمِيرَ لِتَرْكَبُوهَا وَزِينَةً ۚ وَيَخْلُقُ مَا لَا تَعْلَمُونَ ﴿٩﴾

10. තවද (ධර්මයේ) නිවැරදි මාර්ගය පෙන්වීම අල්ලාහ් කෙරෙහිය. එහෙත් (ධර්මයෙන්) ඉවත්ව යන මාර්ගද ඇත. තවද ඔහු තම අභිමතය (ක්‍රියාත්මක) කරන්නට යෙදුනි නම් ඔහු නුඹලා සියල්ලන්ටම මග පෙන්වන්නට තිබුණි.

وَعَلَى اللَّهِ قَصْدُ السَّبِيلِ وَمِنْهَا جَائِرٌ ۚ وَلَوْ شَاءَ لَهَدَاكُمْ أَجْمَعِينَ ﴿١٠﴾

11. වලාකුළුවලින් නුඹලා සඳහා ජලය පහළ කරන්නේ ඔහුමය. එයින් නුඹලාට පානය ඇත. තවද (නුඹලාගේ ගවසතුන්ට) නුඹලා තණ කැවීමට එයින් ගස් (වැඩෙන්නේ)ය.

هُوَ الَّذِي أَنزَلَ مِنَ السَّمَاءِ مَاءً ۖ لَّكُم مِّنْهُ شَرَابٌ وَمِنْهُ شَجَرٌ فِيهِ تُسِيمُونَ ﴿١١﴾

12. එමගින් නුඹලාට (සියළු වර්ගයේ) වැවිලිද ඔලිව්ද රටඉඳි ගස්ද මිදි මෙන්ම සෑම වර්ගයකම පළතුරුද ඔහු හටගන්වන්නේය. නියතවශයෙන්ම මෙනෙහි කරන ජනතාවට එහි සළකුණක් ඇත.

يُنبِتُ لَكُم بِهِ الزَّرْعَ وَالزَّيْتُونَ وَالنَّخِيلَ وَالْأَعْنَابَ وَمِن كُلِّ الثَّمَرَاتِ ۗ إِنَّ فِي ذَٰلِكَ لَآيَةً لِّقَوْمٍ يَتَفَكَّرُونَ ﴿١٢﴾

13. තවද ඔහු නුඹලාට රාත්‍රිය සහ දවාලද ඉර සහ හඳද සේවය සඳහා යොදවා ඇත. තවද තාරකාවන් (පවා) ඔහුගේ විධානයෙන් සේවය සඳහා යොදවා ඇත. නියතවශයෙන්ම වටහාගන්නා ජනතාවට එහි සලකුණු ඇත.

وَسَخَّرَ لَكُمُ اللَّيْلَ وَالنَّهَارَ وَالشَّمْسَ وَالْقَمَرَ ۖ وَالنُّجُومُ مُسَخَّرَاتٌ بِأَمْرِهِ ۗ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّقَوْمٍ يَعْقِلُونَ ﴿١٣﴾

وَمَا ذَرَاَ لَكُمۡ فِى الۡاَرۡضِ مُخۡتَلِفًا اَلۡوَانُهٗ ؕ اِنَّ فِىۡ ذٰ لِكَ لَاٰيَةً لِّقَوۡمٍ يَّذَّكَّرُوۡنَ ﴿۱۴﴾

14. තවද ඔහු නුඹලාට පොළොවෙහි විවිධ වර්ණ වලින් යුත් දේවල් මවා ඇත්තේ (සේවය සඳහා)ය. නියතවශයෙන්ම අනුශාසනා ලබන ජනතාවට එහි සලකුණක් ඇත.

وَهُوَ الَّذِىۡ سَخَّرَ الۡبَحۡرَ لِتَاۡكُلُوۡا مِنۡهُ لَحۡمًا طَرِيًّا وَّتَسۡتَخۡرِجُوۡا مِنۡهُ حِلۡيَةً تَلۡبَسُوۡنَهَا ۚ وَتَرَى الۡـفُلۡكَ مَوَاخِرَ فِيۡهِ وَلِتَبۡتَغُوۡا مِنۡ فَضۡلِهٖ وَلَعَلَّكُمۡ تَشۡكُرُوۡنَ ﴿۱۵﴾

15. තවද මුහුද, එයින් නුඹලා නැවුම් මාංශ අනුභව කරනු පිණිසද නුඹලා පළඳින ආභරණ එයින් පිටතට ගනු පිණිසද නුඹලාට සේවය සඳහා යොදවා ඇත්තේ ඔහුමය. තවද ඔබ (මුහුදේ යාත්‍රා කරනු පිණිස) රළ භාගෙන ඉදිරියට ගමන් කරන්නාවූ නැව් දකින්නෙහිය. තවද එය නුඹලා ඔහුගේ වරප්‍රසාදය සොයාගනු පිණිසත් නුඹලා කෘතඥ වනු පිණිසත්ය.

وَاَلۡقٰى فِى الۡاَرۡضِ رَوَاسِىَ اَنۡ تَمِيۡدَ بِكُمۡ وَاَنۡهٰرًا وَّسُبُلًا لَّعَلَّكُمۡ تَهۡتَدُوۡنَۙ ﴿۱۶﴾

*16. තවද ඔහු නුඹලාව පෝෂණය කිරීමට පොළොවෙහි තිරසාර කඳු පිහිටුවා ඇත්තේය. තවද නුඹලා සෘජු මාර්ගයෙහි නිරතවනු පිණිස ගංගාවන්ද මාර්ගයන්ද (පිහිටුවා ඇත්තේය).

---

* සටහන. 16: 'අන් තමීද බිකුම්' (اَنۡ تَمِيۡدَ بِكُمۡ) යන වාක්‍යය බොහෝ උගතුන් විසින් 'කම්පාවක්' ලෙස අර්ථ දක්වා ඇත. එය එලෙස පිළිගත්තේ නම් දෙවියන් ඔහුගේ වරප්‍රසාදයන් මිනිස් වර්ගයාට මතක් කර දීමට, අති විශාල විනාශයන් ඇති කරන්නාවූ මහත් භූමි කම්පා ඇති කිරීමට අපි කඳු මවා ඇත්තෙමු යන්න මෙහිදී අරුතවත් වේ. මෙහි එන 'තමීද' යන වචනය, 'මාද' එනම් ආහාර සැපයීම යන තේරුම දෙන වචනයෙන් සෑදුනු එකක් බව නොසලකා හැරීම අවාසනාවකි. ශුද්ධ වූ කුර්ආනයෙහි යෙදී ඇති 'මාඉදා' යන වචනයද ඉහත වචනයේම භාවක්‍රියා රූපයකි. මෙම අරුත සමග බලන විට මෙම වාක්‍යයෙහි මුළු තේරුම වෙනස් වන්නේය. මෙමගින් මිනිස් වර්ගයාට මතක් කර දෙන කරුණ නම් සියළුම ජීවීන්ට ආහාර සැපයීම සඳහා දෙවියන් විසින් කඳු මවා ඇති බවයි. පොකුණු, මුහුදු සහ සාගර වලින් නිරතුරුවම ජලය වාෂ්ප වීම මගින් ඉහළ මට්ටමට එසවී එමගින් ඝන අංශු බවට පත්වන්නේය. මෙම වාෂ්ප නැවත ජලය බවට පත් වීමට කඳුවල පැවැත්ම අත්‍යවශ්‍ය වන අතර එමගින් සියළු දෙසට පැතිර යන වැසි ඇති වී ඒවා පොළොවට පතිත වී අති විශාල ආහාර ජාලයන් ඇතිවේ. මෙම පරිවර්තනය පමණක් මෙම පාඨයට ගැලපෙන අතර මෙහි ඉතිරි වාක්‍ය වලටද සම්පූර්ණව එකඟ වේ. එම නිසා මෙහි නිවැරදි අරුත විය හැක්කේ, 'ඔහු පොළව මත කඳු පිහිටුවා ඇත්තේ ඒවා නුඹලාට ආහාර සැපයීම සඳහාද ගංගා සහ මාර්ගයන් නුඹලාට මග පෙන්වීම සඳහාද වේ' යන්නයි.

ජලය සහ ආහාර අතර සම්බන්ධය ඉතා පැහැදිලිය. ශිෂ්ඨාචාර ඉතිහාසයේ ගංගාවල් ඉතා වැදගත් ස්ථානයක් ගත්තේ ඒවා මගින් කඳුකර ප්‍රදේශවල ගං ඉවුරු ඔස්සේ මාර්ගයන් ඇති වීම නිසාය.

وَعَلٰمٰتٍ ؕ وَبِالنَّجْمِ هُمْ يَهْتَدُوْنَ ﴿١٧﴾

17. එමෙන්ම (අනෙක්) සලකුණු(ද) වේ. තාරකා මගින්ද ඔවුහු නිවැරදි දිශාව අනුගමනය කරති.

اَفَمَنْ يَّخْلُقُ كَمَنْ لَّا يَخْلُقُ ؕ اَفَلَا تَذَكَّرُوْنَ ﴿١٨﴾

18. එබැවින් මවන්නා වන ඔහු, නොමවන්නෙකු මෙන් විය හැකිද? එසේ තිබියදීත් නුඹලා නොතකන්නෙහුද?

وَاِنْ تَعُدُّوْا نِعْمَةَ اللّٰهِ لَا تُحْصُوْهَا ؕ اِنَّ اللّٰهَ لَغَفُوْرٌ رَّحِيْمٌ ﴿١٩﴾

19. තවද නුඹලා අල්ලාහ්ගේ අනුග්‍රහයන් ගණන් කිරීමට (තැත්) කළහොත් නුඹලාට ඒවා ගිණිය නොහැකි වන්නේමය. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَاللّٰهُ يَعْلَمُ مَا تُسِرُّوْنَ وَمَا تُعْلِنُوْنَ ﴿٢٠﴾

20. තවද නුඹලා සඟවන දේද නුඹලා හෙළිකරන දේද අල්ලාහ් දන්නේය.

وَالَّذِيْنَ يَدْعُوْنَ مِنْ دُوْنِ اللّٰهِ لَا يَخْلُقُوْنَ شَيْـًٔا وَّهُمْ يُخْلَقُوْنَ ﴿٢١﴾

21. තවද යමෙක් අල්ලාහ් හැර වෙනත් අයව කැඳවන්නේද ඒ අය කිසිවක් නොමවති. නමුත් ඒ අයද මවනු ලැබූවන්ය.

اَمْوَاتٌ غَيْرُ اَحْيَآءٍ ۚ وَمَا يَشْعُرُوْنَ ۙ اَيَّانَ يُبْعَثُوْنَ ﴿٢٢﴾ ع

22. (ඔවුන්) මළවුන්ය. ජීවය ඇත්තන් නොවේ. තවද ඔවුන් නැගිටවනු ලබන්නේ කවදාදැයි ඔවුන් නොදනිති.

اِلٰهُكُمْ اِلٰهٌ وَّاحِدٌ ۚ فَالَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ قُلُوْبُهُمْ مُّنْكِرَةٌ وَّهُمْ مُّسْتَكْبِرُوْنَ ﴿٢٣﴾

23. නුඹලාගේ (නැමදීමට සුදුස්සා වන) දෙවියන් එකම දෙවියන් වේ. තවද පරලොව ගැන විශ්වාස නොකරන්නන් ගත්කල ඔවුන්ගේ හදවත් (සත්‍යයට) ප්‍රතික්ෂේපය. තවද ඔවුහු අහංකාර වන්නන්ය.

لَا جَرَمَ اَنَّ اللّٰهَ يَعْلَمُ مَا يُسِرُّوْنَ وَمَا يُعْلِنُوْنَ ؕ اِنَّهٗ لَا يُحِبُّ الْمُسْتَكْبِرِيْنَ ﴿٢٤﴾

24. නිසැකවම ඔවුන් සඟවන දේද ඔවුන් හෙළිකරන දේද අල්ලාහ් දනියි. නියතවශයෙන්ම ඔහු අහංකාර වන්නන්ව ප්‍රිය නොකරයි.

وَاِذَا قِيْلَ لَهُمْ مَّاذَآ اَنْزَلَ رَبُّكُمْ ۙ قَالُوْٓا

25. තවද නුඹලාගේ අධිපතියාණන් පහළ කර ඇති දේ ගැන (නුඹලා)

اَسَاطِيْرُ الْاَوَّلِيْنَ ۝٢٥

කුමක් (සිතන්නෙහු)දැ?යි ඔවුන්ට පවසනු ලැබූ විට ඔවුහු 'පැරැන්නන්ගේ කථාවන්' යැයි කියති.

لِيَحْمِلُوْٓا اَوْزَارَهُمْ كَامِلَةً يَّوْمَ الْقِيٰمَةِ ۙ وَمِنْ اَوْزَارِ الَّذِيْنَ يُضِلُّوْنَهُمْ بِغَيْرِ عِلْمٍ ؕ اَلَا سَآءَ مَا يَزِرُوْنَ ۝٢٦

26. ඒනිසා පුනරුත්ථාන දිනයේදී ඔවුන් තමන්ගේ බර මුළුමනින්ම උසුලනු ඇත. එමෙන්ම දැනුමෙන් තොරව නොමග යවනු ලැබූ අයගේ බරින් කොටසක්(ද) උසුලනු ඇත. අවධාරණයයි! ඔවුන් උසුලන දේ ඉතා නපුරුය.

قَدْ مَكَرَ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ فَاَتَى اللّٰهُ بُنْيَانَهُمْ مِّنَ الْقَوَاعِدِ فَخَرَّ عَلَيْهِمُ السَّقْفُ مِنْ فَوْقِهِمْ وَاَتٰىهُمُ الْعَذَابُ مِنْ حَيْثُ لَا يَشْعُرُوْنَ ۝٢٧

27. ඔවුන්ට පෙර සිටි අය(ද) සැලසුම් කළහ. එහෙත් අල්ලාහ් ඔවුන්ගේ ගොඩනැගිලි අත්තිවාරම්වලින්ම මුලිනුපුටා දැමුවේය. එබැවින් වහල ඔවුනට ඉහලින් ඔවුන් මත කඩා වැටුණි. තවද ඔවුන් නොදත් තැනකින් ඔවුන්ට දඬුවම පැමිණුනි.

ثُمَّ يَوْمَ الْقِيٰمَةِ يُخْزِيْهِمْ وَيَقُوْلُ اَيْنَ شُرَكَآءِيَ الَّذِيْنَ كُنْتُمْ تُشَآقُّوْنَ فِيْهِمْ ؕ قَالَ الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ اِنَّ الْخِزْيَ الْيَوْمَ وَالسُّوْٓءَ عَلَى الْكٰفِرِيْنَ ۝٢٨

28. පසුව පුනරුත්ථාන දිනයේදී ඔහු ඔවුන්ව අවමානයට ලක් කරන්නේය. තවද 'නුඹලා (වෙත පැමිණි දූතයින්ට) විරුද්ධ වීමට හේතු වී සිටි (නුඹලා ආදේශ කළ) මාගේ 'සමානයන්' කොහිදැ?'යි කියනු ඇත. දැනුම ලද අය 'මෙදින අවමානය සහ විපත නියතවශයෙන්ම අවිශ්වාසිතයින් මත (පතිත) වන්නේමයැ'යි පවසන්නෝය.

الَّذِيْنَ تَتَوَفّٰىهُمُ الْمَلٰٓئِكَةُ ظَالِمِيْٓ اَنْفُسِهِمْ ۖ فَاَلْقَوُا السَّلَمَ مَا كُنَّا نَعْمَلُ مِنْ سُوْٓءٍ ؕ بَلٰٓى اِنَّ اللّٰهَ عَلِيْمٌۢ بِمَا كُنْتُمْ تَعْمَلُوْنَ ۝٢٩

29. ඔවුන් සිය ආත්මයන් හට වැරදි කරමින් සිටියදී සුරදූතයින් ඔවුන්ට මරණය පමුණුවන්නෝය. පසුව ඔවුන් (වරදකරුවන්) 'අපි කිසිදු දුෂ්ඨකමක් කර නැත්තෙමු'යි (පවසමින්) යටහත් වන්නෝය. නොඑසේය නුඹලා කරමින් සිටි දේ පිළිබඳව නියතවශයෙන්ම අල්ලාහ් දන්නේය.

فَادْخُلُوْٓا اَبْوَابَ جَهَنَّمَ خٰلِدِيْنَ فِيْهَا ؕ

30. එබැවින් නිරයේ දොරටුවලින් ඇතුළුවනු, එහි දිගුකල් වාසය කරනු.

فَلَبِئْسَ مَثْوَى الْمُتَكَبِّرِينَ ۝٣٠

අහංකාර වන්නන්ගේ වාසස්ථානය ඇත්තෙන්ම ඉතා නපුරුය.

وَقِيلَ لِلَّذِينَ اتَّقَوْا مَاذَا أَنْزَلَ رَبُّكُمْ ۚ قَالُوا خَيْرًا ۗ لِلَّذِينَ أَحْسَنُوا فِي هَٰذِهِ الدُّنْيَا حَسَنَةٌ ۚ وَلَدَارُ الْآخِرَةِ خَيْرٌ ۚ وَلَنِعْمَ دَارُ الْمُتَّقِينَ ۝٣١

31. තවද 'නුඹලාගේ අධිපතියාණන් පහළ කර ඇති දේ ගැන (නුඹලා) කුමක් (සිතන්නෙහු)දැ?'යි බියබැතිමතුන්ගෙන් පවසනු ලැබූ විට ඔවුහු 'වඩාත් හොඳයැ'යි කියති. යහපත කරන්නන්ට මෙලොවෙහි යහපතම ඇත. තවද පරලොවේ නිවස වඩාත්ම යහපත්ය. බියබැතිමතුන්ගේ වාසස්ථානය සත්තකින්ම අති විශිෂ්ඨ වේ.

جَنَّاتُ عَدْنٍ يَدْخُلُونَهَا تَجْرِي مِنْ تَحْتِهَا الْأَنْهَارُ لَهُمْ فِيهَا مَا يَشَاءُونَ ۚ كَذَٰلِكَ يَجْزِي اللَّهُ الْمُتَّقِينَ ۝٣٢

32. සදාකාලික උද්‍යානයන්හි ඔවුහු ඇතුළුවන්නෝය. ඒ මැදින් දිය දහරාවන් ගලා බසී. ඔවුන් පතන සියළු දේ එහිදී ඔවුනට ලැබෙනු ඇත. මේ ආකාරයට අල්ලාහ් බියබැතිමතුන්ට තිළිණ ලබා දෙන්නේය.

الَّذِينَ تَتَوَفَّاهُمُ الْمَلَائِكَةُ طَيِّبِينَ ۙ يَقُولُونَ سَلَامٌ عَلَيْكُمُ ۙ ادْخُلُوا الْجَنَّةَ بِمَا كُنْتُمْ تَعْمَلُونَ ۝٣٣

33. ඔවුන් පරිශුද්ධව සිටියදී සුරදූතයින් ඔවුන්ට මරණය පමුණුවන්නෝය. ඔවුහු 'නුඹලාට සාමය අත් වේවා. නුඹලා කරමින් සිටි දේ හේතුවෙන් ස්වර්ගයට පිවිසෙනු'යි කියති.

هَلْ يَنْظُرُونَ إِلَّا أَنْ تَأْتِيَهُمُ الْمَلَائِكَةُ أَوْ يَأْتِيَ أَمْرُ رَبِّكَ ۚ كَذَٰلِكَ فَعَلَ الَّذِينَ مِنْ قَبْلِهِمْ ۚ وَمَا ظَلَمَهُمُ اللَّهُ وَلَٰكِنْ كَانُوا أَنْفُسَهُمْ يَظْلِمُونَ ۝٣٤

34. (අවිශ්වාසිතයින් වන)ඔවුන් වෙත සුරදූතයින් පැමිණිය යුතු යැයි හෝ ඔබ අධිපතියාණන්ගේ නියමය අත්විය යුතු යැයි හෝ මිස අන්කිසිවක් ඔවුන් බලාපොරොත්තු වන්නේද? ඔවුන්ට පෙර සිටි අයද එසේ කළහ. අල්ලාහ් ඔවුන්ට වරද නොකළේය. එහෙත් ඔවුහු තමන්ටම වරද කරමින් සිටියහ.

فَأَصَابَهُمْ سَيِّئَاتُ مَا عَمِلُوا وَحَاقَ بِهِمْ مَا كَانُوا بِهِ يَسْتَهْزِئُونَ ۝٣٥

35. එබැවින් ඔවුන්ගේ ක්‍රියාවන්හි දුෂ්ඨ (ඵලවිපාක)ය ඔවුනට අත්විය. තවද ඔවුන් සරදම් කරමින් සිටි දේ ඔවුන්වම වෙලා ගත්තේය.

وَقَالَ الَّذِينَ أَشْرَكُوا لَوْ شَاءَ اللَّهُ مَا

36. 'අල්ලාහ්ගේ කැමැත්ත එසේ වූණි

عَبَدْنَا مِنْ دُوْنِهٖ مِنْ شَيْءٍ نَّحْنُ وَلَآ
اٰبَآؤُنَا وَلَا حَرَّمْنَا مِنْ دُوْنِهٖ مِنْ شَيْءٍ ؕ
كَذٰلِكَ فَعَلَ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ ۚ
فَهَلْ عَلَى الرُّسُلِ اِلَّا الْبَلٰغُ الْمُبِيْنُ ﴿٣٦﴾

නම්, අප මෙන්ම අපගේ පියවරුන්ද ඔහු හැරෙන්නට අන් දෙයක් නොනැමදිය යුතුව තිබුණි, ඔහුගේ (විධානයෙන්) හැරෙන්නට අප විසින් කිසිවක් තහනම් නොකළ යුතුව තිබුණැ'යි දෙවියන්ට සමානයන් ඇති කළ අය කියති. ඔවුන්ට පෙර සිටි අයද එසේ කළහ. එහෙත් පණිවිඩය පැහැදිලිව දන්වා සිටීම පමණක් හැර දූතයන්ට වෙන කුමන වගකීමක් ඇත්ද?

وَلَقَدْ بَعَثْنَا فِيْ كُلِّ اُمَّةٍ رَّسُوْلًا اَنِ اعْبُدُوا
اللّٰهَ وَاجْتَنِبُوا الطَّاغُوْتَ ۚ فَمِنْهُمْ مَّنْ
هَدَى اللّٰهُ وَمِنْهُمْ مَّنْ حَقَّتْ عَلَيْهِ
الضَّلٰلَةُ ؕ فَسِيْرُوْا فِي الْاَرْضِ فَانْظُرُوْا
كَيْفَ كَانَ عَاقِبَةُ الْمُكَذِّبِيْنَ ﴿٣٧﴾

37. 'අල්ලාහ්ට නමදිනු, දුෂ්ඨයන්ගෙන් ඉවත්ව සිටිනු'යි (දේශනා කරන) දූතයෙකු අපි සෑම ජන කොටසකින්ම බිහි කෙළෙමු. තවද ඔවුන් අතුරින් සමහරෙකුට අල්ලාහ් මගපෙන්වූයේය. තවද ඔවුන් අතුරින් (සමහරෙකු) විනාශයට සුදුස්සන් වූහ. එබැවින් (චක්තෘවරයින්ව) මුසාවාදීන් ලෙස සැලකූ අයගේ අවසානය කෙසේ වී දැයි භූමියෙහි සංචාරය කොට දැක බලාගනු.

اِنْ تَحْرِصْ عَلٰى هُدٰىهُمْ فَاِنَّ اللّٰهَ
لَا يَهْدِيْ مَنْ يُّضِلُّ وَمَا لَهُمْ
مِّنْ نّٰصِرِيْنَ ﴿٣٨﴾

38. ඔබ ඔවුන්ට මග පෙන්වීමට උත්සුක වුවද, අල්ලාහ් සහතික ලෙසම (අන් අයව) නොමග යවන්නන්ට මග නොපෙන්වන බව (දැන ගනු). තවද එවැන්නන්ට උදව්කරුවෙකු නොවනු ඇත.

وَاَقْسَمُوْا بِاللّٰهِ جَهْدَ اَيْمَانِهِمْ ۙ لَا يَبْعَثُ
اللّٰهُ مَنْ يَّمُوْتُ ؕ بَلٰى وَعْدًا عَلَيْهِ حَقًّا
وَّلٰكِنَّ اَكْثَرَ النَّاسِ لَا يَعْلَمُوْنَ ۙ ﴿٣٩﴾

39. තවද මරණයට පත්වන අයව අල්ලාහ් නොනැගිටුවන්නේ යැයි ඔවුහු අල්ලාහ්ගේ නාමයෙන් දැඩිව දිවුරති. නොඑසේය, නියතවශයෙන්ම ඔහු ඔවුන්ව නැගිටුවන්නේමය. එය ඔහු තමා කෙරෙහි පවරා ඇති පොරොන්දුවකි. එහෙත් බොහෝ ජනතාව නොදනිති.

لِيُبَيِّنَ لَهُمُ الَّذِيْ يَخْتَلِفُوْنَ فِيْهِ وَلِيَعْلَمَ
الَّذِيْنَ كَفَرُوْٓا اَنَّهُمْ كَانُوْا كٰذِبِيْنَ ﴿٤٠﴾

40. ඔවුන් මතභේද ඇතිකරමින් සිටි දේ ඔහු ඔවුනට පැහැදිලි කරදීම පිණිසද, අවිශ්වාසිත අය තමන් මුසාවාදීන් වී සිටියැයි දැනගනු පිණිසද,(ඔහු ඔවුන්ව නැගිටුවන්නේය).

41. එක් දෙයකට අපගේ වචනය අප අභිමත කරන විට එයට අපි 'වනු'යි පමණක් කියන්නෙමු. එවිට එය වන්නේය.

إِنَّمَا قَوْلُنَا لِشَيْءٍ إِذَا أَرَدْنَاهُ أَن نَّقُولَ لَهُ كُن فَيَكُونُ ﴿٤١﴾

42. තවද අසාධාරණයට ලක්වීමෙන් පසුව අල්ලාහ් වෙනුවෙන් සිය නිවෙස් අත් හැර ගිය අය ගත්කල අපි නියතවශයෙන්ම ඔවුනට යහපත් වාසස්ථානයක් මෙලොවෙහි ලබාදෙන්නෙමු. තවද සත්තකින්ම පරලොවේ තිළිණය වඩාත් ශ්‍රේෂ්ඨය. ඔවුන් දැන සිටියේ නම්.

وَالَّذِينَ هَاجَرُوا فِي اللَّهِ مِن بَعْدِ مَا ظُلِمُوا لَنُبَوِّئَنَّهُمْ فِي الدُّنْيَا حَسَنَةً ۖ وَلَأَجْرُ الْآخِرَةِ أَكْبَرُ ۚ لَوْ كَانُوا يَعْلَمُونَ ﴿٤٢﴾

43. ඔවුන් ස්ථිරසාරව සිටින්නන් මෙන්ම තමන්ගේ අධිපතියාණන් කෙරෙහි තමන්ගේ විශ්වාසය තබන්නන් වෙති.

الَّذِينَ صَبَرُوا وَعَلَىٰ رَبِّهِمْ يَتَوَكَّلُونَ ﴿٤٣﴾

44. තවද අපි ඔවුනට අනාවරණය පහළ කළ පුරුෂයින් මිස ඔබට පෙර (දූතයින් ලෙස) අපි නොඑව්වෙමු. එබැවින් නුඹලා නොදන්නේ නම් දේව ලියවිලි දත්තන්ගෙන් අසනු.

وَمَا أَرْسَلْنَا مِن قَبْلِكَ إِلَّا رِجَالًا نُّوحِي إِلَيْهِمْ ۚ فَاسْأَلُوا أَهْلَ الذِّكْرِ إِن كُنتُمْ لَا تَعْلَمُونَ ﴿٤٤﴾

45. පැහැදිලි සලකුණු සහ ධර්ම ග්‍රන්ථ සමග (අපි ඔවුන්ව යැව්වෙමු). තවද ඔබ මනුෂ්‍ය වර්ගයාට ඔවුන් වෙත පහළ කරන ලද දේ විග්‍රහ කරනු පිණිසද ඔවුන් මෙනෙහි කරනු පිණිසද අපි ඔබ වෙතට මෙම දේවානුශාසනාව පහළ කළෙමු.

بِالْبَيِّنَاتِ وَالزُّبُرِ ۗ وَأَنزَلْنَا إِلَيْكَ الذِّكْرَ لِتُبَيِّنَ لِلنَّاسِ مَا نُزِّلَ إِلَيْهِمْ وَلَعَلَّهُمْ يَتَفَكَّرُونَ ﴿٤٥﴾

46. එසේනම් නපුරු කුමන්ත්‍රණයන් කරන අය ගත්කල, අල්ලාහ් ඔවුන්ව පොළොව තුලට නොගිල්වීමෙන් හෝ ඔවුන් නොදන්නා තැනකින් ඔවුනට දඬුවම් නොපමුණුවීමෙන් හෝ ඔවුන් සුරක්ෂිතද?

أَفَأَمِنَ الَّذِينَ مَكَرُوا السَّيِّئَاتِ أَن يَخْسِفَ اللَّهُ بِهِمُ الْأَرْضَ أَوْ يَأْتِيَهُمُ الْعَذَابُ مِنْ حَيْثُ لَا يَشْعُرُونَ ﴿٤٦﴾

47. නැතහොත් ඔවුන්ගේ ඔබ මොබ

أَوْ يَأْخُذَهُمْ فِي تَقَلُّبِهِمْ فَمَا هُم

بِمُعْجِزِيْنَ ۝٤٧

යැමෙහි ඔහු ඔවුන්ව ග්‍රහණය නොකරන්නේ යැයි (ඔවුන් සුරක්ෂිතද?) එබැවින් ඔවුනට (දෙවියන්ගේ සැලසුම) නිෂ්ඵල කළ නොහැකි වන්නේමය.

اَوْ يَاْخُذَهُمْ عَلٰى تَخَوُّفٍ ؕ فَاِنَّ رَبَّكُمْ لَرَءُوْفٌ رَّحِيْمٌ ۝٤٨

48. නැතහොත් ඔහු ක්‍රමක්‍රමයෙන් විනාශය මගින් ඔවුන්ව ග්‍රහණය නොකරන්නේ යැයි (ඔවුන් සුරක්ෂිතද?) නුඹලාගේ අධිපතියාණන් ඇත්තෙන්ම සානුකම්පිතය, පරම දයාබරය.

اَوَلَمْ يَرَوْا اِلٰى مَا خَلَقَ اللّٰهُ مِنْ شَىْءٍ يَّتَفَيَّؤُا ظِلٰلُهٗ عَنِ الْيَمِيْنِ وَالشَّمَآئِلِ سُجَّدًا لِّلّٰهِ وَهُمْ دٰخِرُوْنَ ۝٤٩

49. ඔවුන් අල්ලාහ්ට අවනත වෙමින් යටහත්පහත්ව සිටියදී අල්ලාහ් මවා ඇති සියල්ලෙහි සෙවනැලි ඇතැම්විට දකුණෙන්ද ඇතැම්විට වම් පැතිවලින්ද මාරු වෙන අන්දම ඔවුන් දැක නොතිබේද?.

وَلِلّٰهِ يَسْجُدُ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الْاَرْضِ مِنْ دَآبَّةٍ وَّالْمَلٰٓئِكَةُ وَهُمْ لَا يَسْتَكْبِرُوْنَ ۝٥٠

50. තවද අහසේහි ඇති කවරක් වුවද එමෙන්ම පොළොවෙහි ඇති ප්‍රාණීන් කුමක් වුවද අල්ලාහ්ට (බැගෑපත්ව) අවනත වෙති. සුරදූතයෝද (එසේ) වෙති. තවද ඔවුහු අහංකාරව නොහැසිරෙති.

يَخَافُوْنَ رَبَّهُمْ مِّنْ فَوْقِهِمْ وَيَفْعَلُوْنَ مَا يُؤْمَرُوْنَ ۝٥١ ۩

51. ඔවුන්ට ඉහලින් සිටින ඔවුන්ගේ අධිපතියාණන් කෙරෙහි ඔවුන් බිය දක්වති. තවද ඔවුනට අණකරනු ලබන දේ ඔවුහු ඉටු කරති.

وَقَالَ اللّٰهُ لَا تَتَّخِذُوْٓا اِلٰهَيْنِ اثْنَيْنِ ۚ اِنَّمَا هُوَ اِلٰهٌ وَّاحِدٌ ۚ فَاِيَّاىَ فَارْهَبُوْنِ ۝٥٢

52. 'දෙවියන් දෙදෙනෙකු (නැමදීමට) නොගනු. නැමදීමට එකම සුදුස්සා ඔහු(අල්ලාහ්) පමණය. එබැවින් මා කෙරෙහි පමණක් බිය වනු'යි අල්ලාහ් කීවේය.

وَلَهٗ مَا فِى السَّمٰوٰتِ وَالْاَرْضِ وَلَهُ الدِّيْنُ وَاصِبًا ؕ اَفَغَيْرَ اللّٰهِ تَتَّقُوْنَ ۝٥٣

53. එමෙන්ම අහසේහිද, පොළොවෙහිද ඇති සියල්ල ඔහුටමය. තවද සදා අවනතවීමත් ඔහුටමය. එසේ නම් නුඹලා අල්ලාහ් හැරෙන්නට වෙනත් දෙයකට බිය දක්වන්නෙහුද?.

54. තවද නුඹලා වෙත ඇති සෑම ආශිර්වාදයක්ම අල්ලාහ් වෙතින්ය. තවද නුඹලාට විපතක් අත්වන විට නුඹලා (උදව් පතා) කන්නලව් කරන්නේ ඔහු වෙතටමය.

وَمَا بِكُم مِّن نِّعْمَةٍ فَمِنَ اللَّهِ ثُمَّ إِذَا
مَسَّكُمُ الضُّرُّ فَإِلَيْهِ تَجْأَرُونَ ﴿٥٤﴾

55. පසුව ඔහු නුඹලාගෙන් විපත පහ කළ කල්හි, එසැනින්ම නුඹලාගෙන් පිරිසක් තමන්ගේ අධිපතියාණන්ට සමානයන් තැබීමට (පටන්) ගනිති.

ثُمَّ إِذَا كَشَفَ الضُّرَّ عَنكُمْ إِذَا فَرِيقٌ
مِّنكُم بِرَبِّهِمْ يُشْرِكُونَ ﴿٥٥﴾

56. එය අප ඔවුන්ට පිරිනැමූ දෙය ඔවුන් ප්‍රතික්ෂේප කරනු පිණිසය. එසේ නම් නුඹලා ටිකක් භුක්ති විඳිනු. නමුත් නුඹලා ඉක්මනින්ම දැනගන්නෙහුය.

لِيَكْفُرُوا بِمَا آتَيْنَاهُمْ فَتَمَتَّعُوا
فَسَوْفَ تَعْلَمُونَ ﴿٥٦﴾

57. තවද අප ඔවුන් වෙත පිරිනැමූ දෙයින් කොටසක් ඔවුහු තමන් නොදන්නා දෙයකට (ව්‍යාජ දෙවිවරුන් සඳහා) වෙන්කරති. අල්ලාහ් සාක්කි! නුඹලා ගොතා ඇති සියළු දේ සඳහා නුඹලා නියතවශයෙන්ම ප්‍රශ්න කරනු ලබන්නෙහුය.

وَيَجْعَلُونَ لِمَا لَا يَعْلَمُونَ نَصِيبًا مِّمَّا
رَزَقْنَاهُمْ تَاللَّهِ لَتُسْأَلُنَّ عَمَّا كُنتُمْ
تَفْتَرُونَ ﴿٥٧﴾

58. තවද ඔවුහු අල්ලාහ්ට දියණියන් ආරෝපණය කරති. ඔහු (එයින්) සුවිශුද්ධය! එහෙත් ඔවුන් කැමති දේ තමන් වෙත තබා ගනිති.

وَيَجْعَلُونَ لِلَّهِ الْبَنَاتِ سُبْحَانَهُ وَلَهُم مَّا
يَشْتَهُونَ ﴿٥٨﴾

59. තවද ඔවුන්ගෙන් කෙනෙකුට ගැහැණු දරුවකු (ගේ උපත) පිළිබඳ ආරංචිය දෙනු ලැබූ කල්හි, ඔහු කණස්සල්ල යටපත් කරන විටදී ඔහුගේ මුහුණ අඳුරු වන්නේය.

وَإِذَا بُشِّرَ أَحَدُهُم بِالْأُنثَىٰ ظَلَّ وَجْهُهُ
مُسْوَدًّا وَهُوَ كَظِيمٌ ﴿٥٩﴾

60. තමා ලද නරක ආරංචිය හේතුවෙන් 'තමා අවමානයට පත් වුවද එය තබා ගන්නේද නැතහොත් එය පසෙහි වළලා දමන්නේදැ?'යි (සිතමින්) ඔහු ජනයාගෙන් සැඟවෙන්නේය. අවධාරණයයි! ඔවුන් තීරණය කරන දේ පාපකාරී වේ.

يَتَوَارَىٰ مِنَ الْقَوْمِ مِن سُوءِ مَا بُشِّرَ بِهِ
أَيُمْسِكُهُ عَلَىٰ هُونٍ أَمْ يَدُسُّهُ فِي
التُّرَابِ أَلَا سَاءَ مَا يَحْكُمُونَ ﴿٦٠﴾

61. පරලොව ගැන විශ්වාස නොකරන අයට ඉතා නරක උපමාව අයත් වන අතර අල්ලාහ්ට අයත් වන්නේ අති උසස් උපමාවය. එමෙන්ම ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

لِلَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ مَثَلُ السَّوْءِ ۚ وَلِلّٰهِ الْمَثَلُ الْاَعْلٰى ؕ وَهُوَ الْعَزِيْزُ الْحَكِيْمُ ﴿٦١﴾

62. තවද අල්ලාහ් මිනිසුන්ට ඔවුන්ගේ වැරදි ක්‍රියාවන් සඳහා දඬුවම් පමුණුවන්නේ නම් ඔහු එහි එක් පිවියෙකුවත් ඉතිරි නොකරනු ඇත. නමුත් ඔහු නියමිත කාලයක් වනතුරු ඔවුන්ට අවකාශය දෙන්නේය. තවද ඔවුන්ගේ කාලය පැමිණෙන විට ඔවුනට එක් මොහොතක්වත් රැඳී සිටීමට නොහැකිය. තවද ඔවුන්ට (එයින්) ඉදිරියට යැමටද නොහැකිය.

وَلَوْ يُؤَاخِذُ اللّٰهُ النَّاسَ بِظُلْمِهِمْ مَّا تَرَكَ عَلَيْهَا مِنْ دَآبَّةٍ وَّلٰكِنْ يُّؤَخِّرُهُمْ اِلٰٓى اَجَلٍ مُّسَمًّى ۚ فَاِذَا جَآءَ اَجَلُهُمْ لَا يَسْتَاْخِرُوْنَ سَاعَةً وَّلَا يَسْتَقْدِمُوْنَ ﴿٦٢﴾

63. තවද ඔවුන් (තමන්ට) අකැමති දේ අල්ලාහ්ට ආරෝපණය කරති. තවද (සෑම දෙයකින්ම) ඉතාමත් හොඳ දේ ඔවුන්ට බව ඔවුන්ගේ දිව් මුසාබස් දොඩවති. නිසැකවම ඔවුන්ට ගින්න අත්වන්නේය. තවද ඔවුහු (එහි) අත්හැර දමනු ලබන්නෝය.

وَيَجْعَلُوْنَ لِلّٰهِ مَا يَكْرَهُوْنَ وَتَصِفُ اَلْسِنَتُهُمُ الْكَذِبَ اَنَّ لَهُمُ الْحُسْنٰى ؕ لَا جَرَمَ اَنَّ لَهُمُ النَّارَ وَاَنَّهُمْ مُّفْرَطُوْنَ ﴿٦٣﴾

64. අල්ලාහ් සාක්කි! අපි ඔබට පෙර ජනතාවන් වෙත (දූතයින්ව) යැව්මු. එහෙත් ෂෙයිතාන් ඔවුන්ගේ (ජනයාගේ) ක්‍රියාවන් ඔවුන්ට අලංකාරව (පෙනෙන්නට) සැලැස්සුවේය. එබැවින් අද දිනයේදී ඔහු ඔවුන්ගේ භාරකරුවාය. තවද ඔවුන්ට දැඩි දඬුවමක් අත්වන්නේය.

تَاللّٰهِ لَقَدْ اَرْسَلْنَآ اِلٰٓى اُمَمٍ مِّنْ قَبْلِكَ فَزَيَّنَ لَهُمُ الشَّيْطٰنُ اَعْمَالَهُمْ فَهُوَ وَلِيُّهُمُ الْيَوْمَ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿٦٤﴾

65. තවද ඔවුන් වෙනස් මත දරන කරුණු ගැන ඔබ ඔවුන්ට විස්තර කරදීමට හැකි වනු පිණිසත් විශ්වාසිතයින්ට මග පෙන්වීමක් හා දයාවක් වශයෙන් මිස අන් දෙයක් සඳහා මෙම ග්‍රන්ථය අපි ඔබ වෙත පහළ නොකළෙමු.

وَمَآ اَنْزَلْنَا عَلَيْكَ الْكِتٰبَ اِلَّا لِتُبَيِّنَ لَهُمُ الَّذِى اخْتَلَفُوْا فِيْهِ ۙ وَهُدًى وَّرَحْمَةً لِّقَوْمٍ يُّؤْمِنُوْنَ ﴿٦٥﴾

66. තවද අල්ලාහ් අහසින් ජලය පහළ කර එමගින් පොළොව එහි අභාවයෙන් පසු ප්‍රාණවත් කරන්නේය. නියතවශයෙන්ම ඇහුම්කන් දෙන ජනතාවට එහි සළකුණක් ඇත.

وَاللَّهُ أَنْزَلَ مِنَ السَّمَاءِ مَاءً فَأَحْيَا بِهِ الْأَرْضَ بَعْدَ مَوْتِهَا ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَةً لِقَوْمٍ يَسْمَعُونَ ﴿٦٦﴾

67. තවද සැබැවින්ම ගව සතුන් තුල(ද) නුඹලාට පාඩමක් ඇත. පානය කරන්නන් සඳහා උන්ගේ කුස තුල ඇති දෙයින් ගොම හා රුධිරය අතරින් ඇති පිරිසිදු (මෙන්ම) ප්‍රබෝධ වූත් කිරි, පානය කිරීමට අපි නුඹලාට ලබා දෙන්නෙමු.

وَإِنَّ لَكُمْ فِي الْأَنْعَامِ لَعِبْرَةً ۖ نُسْقِيكُمْ مِمَّا فِي بُطُونِهِ مِنْ بَيْنِ فَرْثٍ وَدَمٍ لَبَنًا خَالِصًا سَائِغًا لِلشَّارِبِينَ ﴿٦٧﴾

68. තවද රට ඉඳි ගසෙහි පළතුරු හා මිදි වලින්ද (අපි පානය ලබා දෙන්නෙමු). එයින් නුඹලා මත් පැන්ද ගුණදායක ආහාරද සාදා ගන්නෙහුය. වටහාගන්නා ජනතාවකට සැබැවින්ම මෙහි සළකුණක් ඇත.

وَمِنْ ثَمَرَاتِ النَّخِيلِ وَالْأَعْنَابِ تَتَّخِذُونَ مِنْهُ سَكَرًا وَرِزْقًا حَسَنًا ۗ إِنَّ فِي ذَٰلِكَ لَآيَةً لِقَوْمٍ يَعْقِلُونَ ﴿٦٨﴾

69. තවද ඔබගේ අධිපතියාණන් මී මැස්සාට, 'කඳුවල ගස්වල සහ ඔවුන් තනන පන්දලම්වල කූඩු තනන්නැ'යි (පවසමින්) අනාවරණය (පහළ) කළේය.

وَأَوْحَىٰ رَبُّكَ إِلَى النَّحْلِ أَنِ اتَّخِذِي مِنَ الْجِبَالِ بُيُوتًا وَمِنَ الشَّجَرِ وَمِمَّا يَعْرِشُونَ ﴿٦٩﴾

70. 'සෑම (වර්ගයේ) පළතුරු වලින් අනුභව කරව. තම අධිපතියාණන්ගේ පහසු මං හි යටහත් පහත්ව ගමන් කරව'. විවිධ වර්ණයෙන් යුත් පානයක් උන්ගේ කුස තුලින් පිටවේ. මිනිසුන්ට එහි සුවය ඇත. නියතවශයෙන්ම මෙනෙහි කරන ජනතාවකට එහි සළකුණක් ඇත.

ثُمَّ كُلِي مِنْ كُلِّ الثَّمَرَاتِ فَاسْلُكِي سُبُلَ رَبِّكِ ذُلُلًا ۚ يَخْرُجُ مِنْ بُطُونِهَا شَرَابٌ مُخْتَلِفٌ أَلْوَانُهُ فِيهِ شِفَاءٌ لِلنَّاسِ ۗ إِنَّ فِي ذَٰلِكَ لَآيَةً لِقَوْمٍ يَتَفَكَّرُونَ ﴿٧٠﴾

71. තවද අල්ලාහ් නුඹලාව මැව්වේය. පසුව ඔහු නුඹලාට මරණය පමුණුවන්නේය. තවද නුඹලා අතරින් (සමහරෙක්) වයසින් ඉතා මුහුකුරා ගිය තත්ත්වයට පත් කරනු

وَاللَّهُ خَلَقَكُمْ ثُمَّ يَتَوَفَّاكُمْ ۚ وَمِنْكُمْ مَنْ يُرَدُّ إِلَىٰ أَرْذَلِ الْعُمُرِ لِكَيْ لَا يَعْلَمَ

بَعْدَ عِلْمٍ شَيْـًٔا ؕ اِنَّ اللّٰهَ عَلِيْمٌ قَدِيْرٌ ﴿۷۱﴾

ලබන්නේය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ඔවුන් සියළු දැනුම ලැබුවායින් පසුව එය අහිමි කරගන්නෝය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල දන්නාය, සර්වබලධාරීය.

وَاللّٰهُ فَضَّلَ بَعْضَكُمْ عَلٰى بَعْضٍ فِى الرِّزْقِ ۚ فَمَا الَّذِيْنَ فُضِّلُوْا بِرَآدِّىْ رِزْقِهِمْ عَلٰى مَا مَلَكَتْ اَيْمَانُهُمْ فَهُمْ فِيْهِ سَوَآءٌ ؕ اَفَبِنِعْمَةِ اللّٰهِ يَجْحَدُوْنَ ﴿۷۲﴾

72. තවද (ලෞකික) සම්පතින් අල්ලාහ් නුඹලාගෙන් සමහරෙකුව අන් අයට ඉහළින් අනුග්‍රහය දක්වා ඇත. එහෙත් වැඩි අනුග්‍රහය ලද අය තමන්ගේ (ලෞකික) සම්පත් වලින් (කිසිදු කොටසක්) තමන්ගේ දකුණත් හිමිකරගත් අය ඒවායෙහි සමාන (කොටස්කරුවන්) වේදෝ යි (සිතා) ඔවුන්ට ආපසු නොදෙන්නෝය. එසේනම් ඔවුන් අල්ලාහ්ගේ අනුග්‍රහය ප්‍රතික්ෂේප කරන්නෝද?

وَاللّٰهُ جَعَلَ لَكُمْ مِّنْ اَنْفُسِكُمْ اَزْوَاجًا وَّجَعَلَ لَكُمْ مِّنْ اَزْوَاجِكُمْ بَنِيْنَ وَحَفَدَةً وَّرَزَقَكُمْ مِّنَ الطَّيِّبٰتِ ؕ اَفَبِالْبَاطِلِ يُؤْمِنُوْنَ وَبِنِعْمَتِ اللّٰهِ هُمْ يَكْفُرُوْنَ ۙ ﴿۷۳﴾

73. තවද අල්ලාහ් නුඹලාට නුඹලාගෙන් සහකරුවන් ඇති කළේය. තවද නුඹලාට නුඹලාගේ සහකරුවන් මගින් පුතුන් සහ මුණුබුරන් ඇති කළේය. එමෙන්ම නුඹලාට යහපත් දැයින් ජීවනෝපාය දී ඇත. ඉන්පසුවත් ඔවුන් නිෂ්ඵල දේවල් කෙරෙහි විශ්වාස කර අල්ලාහ්ගේ අනුග්‍රහය ප්‍රතික්ෂේප කරන්නෝද?

وَيَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ مَا لَا يَمْلِكُ لَهُمْ رِزْقًا مِّنَ السَّمٰوٰتِ وَالْاَرْضِ شَيْـًٔا وَّلَا يَسْتَطِيْعُوْنَ ۚ ﴿۷۴﴾

74. තවද ඔවුන් අල්ලාහ් හැර අහස් සහ පොළොවේ කිසිදු සම්පතක් තමන්ට ලබාදීමට ශක්තියක් නොමැති දේවල් වලට නමදින්නෝය. තවද ඒවාට (කිසිසේත්) බලයක් තිබිය නොහැක.

فَلَا تَضْرِبُوْا لِلّٰهِ الْاَمْثَالَ ؕ اِنَّ اللّٰهَ يَعْلَمُ وَاَنْتُمْ لَا تَعْلَمُوْنَ ﴿۷۵﴾

75. එබැවින් අල්ලාහ්ට උපමාවන් ප්‍රබන්ධ නොකරනු. නියතවශයෙන්ම අල්ලාහ් දන්නේය. නුඹලා නොදන්නෙහුය.

ضَرَبَ اللّٰهُ مَثَلًا عَبْدًا مَّمْلُوْكًا لَّا يَقْدِرُ عَلٰى شَىْءٍ وَّمَنْ رَّزَقْنٰهُ مِنَّا رِزْقًا حَسَنًا فَهُوَ يُنْفِقُ مِنْهُ سِرًّا وَّجَهْرًا ؕ هَلْ

76. අල්ලාහ් එක් දාසයෙක් පිළිබඳව උපමාව ගෙනහැර දක්වයි. ඔහු වහලෙක් මෙන්ම කිසිදු බලයක්ද නොමැත්තෙකි. (අනෙකා නිදහස් මිනිසෙකුය) ඔහුට අප වෙතින් යහපත් ජීවනෝපායෙන් අපි සපයා දී ඇත්තෙමු. ඔහු එයින් රහසිගතවද

එළිපිටද වැය කරයි. ඔවුන් එක හා සමානද? සියළු ප්‍රශංසා අල්ලාහ්ටමය. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

يَسْتَوُنَ ؕ اَلْحَمْدُ لِلّٰهِ ؕ بَلْ اَكْثَرُهُمْ لَا يَعْلَمُوْنَ ﴿٧٦﴾

77. තවද මිනිසුන් දෙදෙනෙකු පිළිබඳව (තවත්) උපමාවක් අල්ලාහ් ගෙන හැර දක්වයි. ඔවුන්ගෙන් එක් අයෙක් ගොළුවෙකි. කිසිදේකට බලයක් නොමැත්තෙකි. තවද මොහු තමාගේ ස්වාමියාට බරක්ය. මොහුව කොතැනක යැව්වද මොහු කිසිදු යහපතක් නොගෙනෙයි. මොහුත්, තමන් ඍජු මාර්ගයෙහි සිට (අන් අයට) යුක්තිය අණ කරන තැනැත්තාත් එක හා සමාන විය හැකිද?.

وَضَرَبَ اللّٰهُ مَثَلًا رَّجُلَيْنِ اَحَدُهُمَاۤ اَبْكَمُ لَا يَقْدِرُ عَلٰى شَىْءٍ وَّهُوَ كَلٌّ عَلٰى مَوْلٰىهُ ۙ اَيْنَمَا يُوَجِّهْهُّ لَا يَاْتِ بِخَيْرٍ ؕ هَلْ يَسْتَوِىْ هُوَ ۙ وَمَنْ يَّاْمُرُ بِالْعَدْلِ ۙ وَهُوَ عَلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٧٧﴾

78. තවද අහස් සහ පොළොවේ අදෘශ්‍යමාන දේ අල්ලාහ්ට හිමිය. තවද එම හෝරාවේ සිද්ධිය ඇසිපිය හෙළීමක් බඳුය. නැතහොත් එය ඊටත් වඩා සමීපය. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

وَلِلّٰهِ غَيْبُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ وَمَاۤ اَمْرُ السَّاعَةِ اِلَّا كَلَمْحِ الْبَصَرِ اَوْ هُوَ اَقْرَبُ ؕ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ﴿٧٨﴾

79. තවද නුඹලා කිසිවක් නොදැන සිටියදී අල්ලාහ් නුඹලාව නුඹලාගේ මව්වරුන්ගේ ගර්භාශයන් තුළින් පිට කළේය. තවද නුඹලා කෘතගුණ දක්වනු පිණිස නුඹලාට කන්, ඇස් සහ හදවත් ලබා දුන්නේය.

وَاللّٰهُ اَخْرَجَكُمْ مِّنْۢ بُطُوْنِ اُمَّهٰتِكُمْ لَا تَعْلَمُوْنَ شَيْـًٔا ۙ وَّجَعَلَ لَكُمُ السَّمْعَ وَالْاَبْصَارَ وَالْاَفْـِٕدَةَ ۙ لَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿٧٩﴾

80. අහස් ගැබෙහි යටහත් පහත්ව රඳවනු ලැබූ පක්ෂීන්ව ඔවුන් නිරීක්ෂණය නොකරන්නේද? උන්ව (ඉහළින්) රඳවා තබන්නේ අල්ලාහ් හැර අන් කිසිවෙකු නොවේ. විශ්වාස කරන ජනතාවට සැබැවින්ම එහි සලකුණු ඇත.

اَلَمْ يَرَوْا اِلَى الطَّيْرِ مُسَخَّرٰتٍ فِىْ جَوِّ السَّمَاۤءِ ؕ مَا يُمْسِكُهُنَّ اِلَّا اللّٰهُ ؕ اِنَّ فِىْ ذٰلِكَ لَاٰيٰتٍ لِّقَوْمٍ يُّؤْمِنُوْنَ ﴿٨٠﴾

81. තවද අල්ලාහ් නුඹලාගේ නිවෙස් නුඹලාට විවේකස්ථානයක් කර ඇත. තවද ගව සතුන්ගේ හම් වලින් නුඹලාට වාසස්ථානයන් ඇති කළේය. නුඹලා ගමනේ යෙදෙන දිනයේදීත්

وَاللّٰهُ جَعَلَ لَكُمْ مِّنْۢ بُيُوْتِكُمْ سَكَنًا وَّجَعَلَ لَكُمْ مِّنْ جُلُوْدِ الْاَنْعَامِ بُيُوْتًا

تَسْتَخِفُّونَهَا يَوْمَ ظَعْنِكُمْ وَيَوْمَ إِقَامَتِكُمْ ۙ وَمِنْ أَصْوَافِهَا وَأَوْبَارِهَا وَأَشْعَارِهَا أَثَاثًا وَمَتَاعًا إِلَىٰ حِينٍ ﴿٨١﴾

නුඹලා ලැගුම් ගන්නා දිනයේදීත් නුඹලා එය සැහැල්ලුවක්ව දකින්නෝය. එමෙන්ම උන්ගේ ලෝම මගින්ද උන්ගේ කෙඳි වලින්ද උන්ගේ කෙස් වලින්ද ගෘහ භාණ්ඩයන් සහ කලකට පරිහරණය සඳහා ද්‍රව්‍යයන්ද (ඔහු නුඹලාට සපයා දී ඇත).

وَاللَّهُ جَعَلَ لَكُمْ مِمَّا خَلَقَ ظِلَالًا وَجَعَلَ لَكُمْ مِنَ الْجِبَالِ أَكْنَانًا وَجَعَلَ لَكُمْ سَرَابِيلَ تَقِيكُمُ الْحَرَّ وَسَرَابِيلَ تَقِيكُمْ بَأْسَكُمْ ۚ كَذَٰلِكَ يُتِمُّ نِعْمَتَهُ عَلَيْكُمْ لَعَلَّكُمْ تُسْلِمُونَ ﴿٨٢﴾

82. තවද අල්ලාහ් ඔහු මවා ඇති දේවලින් නුඹලාට සෙවන (ලබාදෙන්නාවූ දේවල්ද) ඇති කළේය. තවද ඔහු කඳුවල නුඹලාට රැකවරණ ස්ථානයන්ද ඇති කළේය. තවද ඔහු නුඹලාව උණුසුමෙන් ආරක්ෂා කරන ඇඟලුම්ද නුඹලාගේ යුද්ධයන්හි නුඹලාව ආරක්ෂා කරන සන්නාහ කබායන්ද නුඹලාට ඇති කළේය. (ඔහුට) නුඹලා අවනත වනු පිණිස ඔහු නුඹලා වෙත ඔහුගේ අනුග්‍රහයන් මෙලෙස සම්පූර්ණ කරන්නේය.

فَإِنْ تَوَلَّوْا فَإِنَّمَا عَلَيْكَ الْبَلَاغُ الْمُبِينُ ﴿٨٣﴾

83. නමුත් ඔවුන් පිටුපාන්නේ නම් එවිට ඔබ කෙරෙහි වගකීම වන්නේ පණිවිඩය පැහැදිලිව පමුණුවීම පමණක්ය.

يَعْرِفُونَ نِعْمَتَ اللَّهِ ثُمَّ يُنْكِرُونَهَا وَأَكْثَرُهُمُ الْكَافِرُونَ ﴿٨٤﴾

84. ඔවුහු අල්ලාහ්ගේ අනුග්‍රහය ඉතා මැනවින් දනිති. එසේ වුවද ඔවුහු එය ප්‍රතික්ෂේප කරති. තවද ඔවුන්ගෙන් බොහෝ අය අකෘතඥ වෙති.

وَيَوْمَ نَبْعَثُ مِنْ كُلِّ أُمَّةٍ شَهِيدًا ثُمَّ لَا يُؤْذَنُ لِلَّذِينَ كَفَرُوا وَلَا هُمْ يُسْتَعْتَبُونَ ﴿٨٥﴾

85. තවද අප සෑම ජනකොටසකින්ම සාක්ෂිකරුවෙකු නැගිටුවන දිනය (සිහිපත් කරනු). පසුව අවිශ්වාස කරන අයට (ආයාචනා කිරීමට) අවසර දෙනු නොලබන්නේය. තවද ඔවුන්ගේ ආයාචනාව පිළිගනු නොලබන්නේය.

وَإِذَا رَأَى الَّذِينَ ظَلَمُوا الْعَذَابَ فَلَا يُخَفَّفُ عَنْهُمْ وَلَا هُمْ يُنْظَرُونَ ﴿٨٦﴾

86. තවද වැරදි කළ අය (සැබැවින්ම) දඬුවම දකින කල්හි ඔවුන්ට එය ලිහිල් නොකරනු ලබන්නේය. තවද ඔවුන්ට කාල අවකාශයද දෙනු නොලබන්නේය.

وَإِذَا رَأَى الَّذِينَ أَشْرَكُوا شُرَكَاءَهُمْ قَالُوا

87. තවද (අල්ලාහ්ට) සමානයන් ඇති

رَبَّنَا هٰٓؤُلَآءِ شُرَكَآؤُنَا الَّذِيْنَ كُنَّا نَدْعُوْا مِنْ دُوْنِكَ ۚ فَاَلْقَوْا اِلَيْهِمُ الْقَوْلَ اِنَّكُمْ لَكٰذِبُوْنَ ﴿٨٧﴾

කරන අය ඔවුන්ගේ සමානයන් දකින කල්හි, ඔවුන් 'අපගේ අධිපතියාණනි ඔබ වෙනුවට අප කැඳවමින් සිටි අපගේ එම සමානයන් මොවුන් වෙති'යි කියන්නෝය. එවිට ඔවුහු (ව්‍යාජ දෙවිවරු) 'නියතවශයෙන්ම නුඹලා බොරුකාරයන් යැ'යි වදනින් ඔවුන්ට ප්‍රතිප්‍රහාර දෙන්නෝය.

وَاَلْقَوْا اِلَى اللّٰهِ يَوْمَئِذِ ۣالسَّلَمَ وَضَلَّ عَنْهُمْ مَّا كَانُوْا يَفْتَرُوْنَ ﴿٨٨﴾

88. තවද එදින ඔවුහු අල්ලාහ්ට අවනතභාවය දක්වන්නෝය. තවද ඔවුන් ගෙතූ දේ සියල්ල ඔවුනට එලක් නොවන්නේය.

اَلَّذِيْنَ كَفَرُوْا وَصَدُّوْا عَنْ سَبِيْلِ اللّٰهِ زِدْنٰهُمْ عَذَابًا فَوْقَ الْعَذَابِ بِمَا كَانُوْا يُفْسِدُوْنَ ﴿٨٩﴾

89. අවිශ්වාස කර අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වන අය ගත්කල ඔවුන් දූෂිතව ක්‍රියා කළ හෙයින් අපි ඔවුනට දඬුවම් පිට දඬුවම් වැඩි කරන්නෙමු.

وَيَوْمَ نَبْعَثُ فِيْ كُلِّ اُمَّةٍ شَهِيْدًا عَلَيْهِمْ مِّنْ اَنْفُسِهِمْ وَجِئْنَا بِكَ شَهِيْدًا عَلٰى هٰٓؤُلَآءِ ۗ وَنَزَّلْنَا عَلَيْكَ الْكِتٰبَ تِبْيَانًا لِّكُلِّ شَيْءٍ وَّهُدًى وَّرَحْمَةً وَّبُشْرٰى لِلْمُسْلِمِيْنَ ﴿٩٠﴾

90. තවද අප ඔවුන් අතරින්ම ඔවුන්ට එරෙහිව සාක්ෂිකරුවෙකුව සෑම ජනකොටසකින්ම නැගිටුවා තවද ඔවුන්ට විරුද්ධව අපි ඔබව සාක්ෂිකරුවකු වශයෙන් ගෙන එන එම දිනය (සිහිපත් කරන්න). තවද අපි ඔබ වෙත සියළු දේ පිළිබඳව පැහැදිලි කිරීමක් ලෙසද මගපෙන්වීමක් සහ දයාවක් ලෙසද (අල්ලාහ්ට) අවනත වන අයට ශුභාරංචි ලෙසද මෙම ග්‍රන්ථය පහළ කර ඇත්තෙමු.

اِنَّ اللّٰهَ يَاْمُرُ بِالْعَدْلِ وَالْاِحْسَانِ وَاِيْتَآئِ ذِى الْقُرْبٰى وَيَنْهٰى عَنِ الْفَحْشَآءِ وَالْمُنْكَرِ وَالْبَغْيِ ۚ يَعِظُكُمْ لَعَلَّكُمْ تَذَكَّرُوْنَ ﴿٩١﴾

91. ඇත්තෙන්ම අල්ලාහ් යුක්තිය ඉටු කිරීමටත් කාරුණිකව සැලකීමටත් ඥාතීන්ට දීම සේ දීමටත් අණ කරන්නේය. තවද අශිෂ්ටත්වය, පිළිකුල්භාවය සහ සීමාව ඉක්මවීමෙන්ද තහනම් කරන්නේය. නුඹලා අවධානයට ගනු පිණිස ඔහු නුඹලාට අවවාද කරන්නේය.

وَأَوْفُوا بِعَهْدِ اللَّهِ إِذَا عَاهَدتُّمْ وَلَا تَنقُضُوا الْأَيْمَانَ بَعْدَ تَوْكِيدِهَا وَقَدْ جَعَلْتُمُ اللَّهَ عَلَيْكُمْ كَفِيلًا ۚ إِنَّ اللَّهَ يَعْلَمُ مَا تَفْعَلُونَ ﴿٩٢﴾

92. තවද නුඹලා (අල්ලාහ් සමග) ගිවිසුමක් කරගත් විට අල්ලාහ්ගේ ගිවිසුම ඉටු කරනු. තවද නුඹලා අල්ලාහ්ව නුඹලාට සාක්ෂිකරුවෙකු කර ඇති හෙයින් ප්‍රතිඥාවන් ස්ථිර කළායින් පසුව ඒවා කඩ නොකරනු. නුඹලා කරන දේ නියතවශයෙන්ම අල්ලාහ් දනී.

وَلَا تَكُونُوا كَالَّتِي نَقَضَتْ غَزْلَهَا مِن بَعْدِ قُوَّةٍ أَنكَاثًا تَتَّخِذُونَ أَيْمَانَكُمْ دَخَلًا بَيْنَكُمْ أَن تَكُونَ أُمَّةٌ هِيَ أَرْبَىٰ مِنْ أُمَّةٍ ۚ إِنَّمَا يَبْلُوكُمُ اللَّهُ بِهِ ۚ وَلَيُبَيِّنَنَّ لَكُمْ يَوْمَ الْقِيَامَةِ مَا كُنتُمْ فِيهِ تَخْتَلِفُونَ ﴿٩٣﴾

93. තවද තමාගේ නූල් කැටීම ශක්තිමත්ව සාදාගත් පසු එය කෑබලි වලට කඩා දමන තැනැත්තියක මෙන් නොවනු. එක් ජනතාවක් සෙසු ජනතාවට වඩා බලවත් නොවනු පිණිස නුඹලාගේ ප්‍රතිඥාවන් නුඹලා අතර වංක උපක්‍රමයක් බවට නුඹලා පත්කර ගන්නෙහුය. නියතවශයෙන්ම අල්ලාහ් එමගින් නුඹලාව පරීක්ෂා කරන්නේය. තවද පුනරුත්ථාන දිනයේදී ඔහු නුඹලා වෙනස් මත දැරූ දේ සම්බන්ධව නුඹලාට පැහැදිලි කරන්නේය.

وَلَوْ شَاءَ اللَّهُ لَجَعَلَكُمْ أُمَّةً وَاحِدَةً وَلَٰكِن يُضِلُّ مَن يَشَاءُ وَيَهْدِي مَن يَشَاءُ ۚ وَلَتُسْأَلُنَّ عَمَّا كُنتُمْ تَعْمَلُونَ ﴿٩٤﴾

94. තවද අල්ලාහ් සිය අභිමතය (ක්‍රියාත්මක) කළේ නම් ඔහු නියතවශයෙන්ම නුඹලා (සියල්ලන්වම) එකම ජනසමූහයක් බවට පත්කරනු ඇත. නමුත් ඔහු කැමති කෙනෙකුව නොමග යැමට ඉඩහරින අතර කැමති කෙනෙකුට මග පෙන්වන්නේය. තවද නුඹලා කරමින් සිටි දේ පිළිබඳව නියතවශයෙන්ම නුඹලා ප්‍රශ්න කරනු ලබන්නෝය.

وَلَا تَتَّخِذُوا أَيْمَانَكُمْ دَخَلًا بَيْنَكُمْ فَتَزِلَّ قَدَمٌ بَعْدَ ثُبُوتِهَا وَتَذُوقُوا السُّوءَ بِمَا صَدَدتُّمْ عَن سَبِيلِ اللَّهِ ۖ وَلَكُمْ عَذَابٌ عَظِيمٌ ﴿٩٥﴾

95. තවද නුඹලාගේ ප්‍රතිඥාවන් නුඹලා අතර වංක උපක්‍රමයක් බවට පත්කර නොගනු. නැතහොත් (නුඹලාගේ) පාදය දැඩිව ස්ථාපිත වූ පසු ලිස්සා යනු ඇත. තවද නුඹලා අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වැළැක්වූ නිසා නුඹලා නපුර විඳින්නෙහුය. තවද නුඹලාට මහත් වූ දඬුවමක් ලැබෙනු ඇත.

وَلَا تَشْتَرُوْا بِعَهْدِ اللّٰهِ ثَمَنًا قَلِيْلًا ؕ اِنَّمَا عِنْدَ اللّٰهِ هُوَ خَيْرٌ لَّكُمْ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿٩٦﴾

96. තවද අල්ලාහ්ගේ ගිවිසුම අල්ප මිලකට හුවමාරු නොකරනු. නියතවශයෙන්ම අල්ලාහ් වෙත ඇති දේ නුඹලාට වඩාත් යහපත්ය. නුඹලා දැන සිටියේ නම්.

مَا عِنْدَكُمْ يَنْفَدُ وَمَا عِنْدَ اللّٰهِ بَاقٍ ؕ وَلَنَجْزِيَنَّ الَّذِيْنَ صَبَرُوْۤا اَجْرَهُمْ بِاَحْسَنِ مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿٩٧﴾

97. නුඹලා සතුව ඇති දේ ශූන්‍ය වනු ඇත. එහෙත් අල්ලාහ් වෙත ඇති දේ නිත්‍යයය. තවද ස්ථිරසාරව සිටින අයහට ඔවුන්ගේ විශිෂ්ඨ ක්‍රියාවන් අනුව ඔවුන්ගේ තිළිණය නියතවශයෙන්ම අපි ලබා දෙන්නෙමු.

مَنْ عَمِلَ صَالِحًا مِّنْ ذَكَرٍ اَوْ اُنْثٰى وَهُوَ مُؤْمِنٌ فَلَنُحْيِيَنَّهٗ حَيٰوةً طَيِّبَةً ۚ وَلَنَجْزِيَنَّهُمْ اَجْرَهُمْ بِاَحْسَنِ مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿٩٨﴾

98. පුරුෂ හෝ ස්ත්‍රිය හෝ කවරෙකු විශ්වාසිතයෙකු වී ධාර්මිෂ්ඨව ක්‍රියා කරන්නේද ඔවුනට පිවිතුරු ජීවිතයක් නියතවශයෙන්ම අපි ලබා දෙන්නෙමු. තවද ඔවුන්ගේ විශිෂ්ඨ ක්‍රියාවන් අනුව එවන් අයගේ තිළිණය නියතවශයෙන්ම අපි පිරිනමන්නෙමු.

فَاِذَا قَرَاْتَ الْقُرْاٰنَ فَاسْتَعِذْ بِاللّٰهِ مِنَ الشَّيْطٰنِ الرَّجِيْمِ ﴿٩٩﴾

99. තවද ඔබ කුර්ආනය පාරායණය කරන විට ශාපලත් ෂෙයිතාන්ගෙ (නපුරෙ)න් අල්ලාහ්ගේ රැකවරණය පතන්න.

اِنَّهٗ لَيْسَ لَهٗ سُلْطٰنٌ عَلَى الَّذِيْنَ اٰمَنُوْا وَعَلٰى رَبِّهِمْ يَتَوَكَّلُوْنَ ﴿١٠٠﴾

100. විශ්වාස කරන අය මෙන්ම තමන්ගේ විශ්වාසය තමන්ගේ අධිපතියාණන් වෙතම තබන අය කෙරෙහි නියතවශයෙන්ම ඔහු(ෂෙයිතාන්)ට කිසිදු බලයක් නැත.

اِنَّمَا سُلْطٰنُهٗ عَلَى الَّذِيْنَ يَتَوَلَّوْنَهٗ وَالَّذِيْنَ هُمْ بِهٖ مُشْرِكُوْنَ ﴿١٠١﴾

101. ඔහුට(ෂෙයිතාන්ට) බලයක් ඇත්තේ ඔහු සමග මිතුරුකම ඇති කරන අය මෙන්ම ඔහුට(අල්ලාහ්ට) සාමානයන් ඇති කරන අය කෙරෙහි පමණි.

وَاِذَا بَدَّلْنَاۤ اٰيَةً مَّكَانَ اٰيَةٍ ۙ وَّاللّٰهُ اَعْلَمُ بِمَا يُنَزِّلُ قَالُوْۤا اِنَّمَاۤ اَنْتَ مُفْتَرٍ ؕ بَلْ اَكْثَرُهُمْ لَا يَعْلَمُوْنَ ﴿١٠٢﴾

102. තවද අප කිසියම් සලකුණක තැනට තවත් සලකුණක් ගෙනෙන විට තවද අල්ලාහ්, ඔහු පහළ කරන දේ ඉතා මැනැවින් දනියි. ඔවුහු 'ඔබ බොරු ගොතන්නෙකුම වේ' යැයි කියති. නොඑසේය ඔවුන්ගෙන් බොහෝ දෙනා නොදනිති.

قُلْ نَزَّلَهُۥ رُوحُ ٱلْقُدُسِ مِن رَّبِّكَ بِٱلْحَقِّ لِيُثَبِّتَ ٱلَّذِينَ ءَامَنُوا۟ وَهُدًى وَبُشْرَىٰ لِلْمُسْلِمِينَ ﴿١٠٣﴾

103. 'ඔබගේ අධිපතියාණන්ගෙන් සත්‍යය සමග ශුද්ධාත්මය මෙය පහළ කළේය. මෙය විශ්වාස කරන අයව ඔහු ස්ථිරසාර කරනු පිණිසත් අවනතවන අයහට මගපෙන්වීමක් හා ශුභාරංචියක් ලෙසත් යැ'යි පවසන්න.

وَلَقَدْ نَعْلَمُ أَنَّهُمْ يَقُولُونَ إِنَّمَا يُعَلِّمُهُۥ بَشَرٌ ۗ لِّسَانُ ٱلَّذِى يُلْحِدُونَ إِلَيْهِ أَعْجَمِىٌّ وَهَٰذَا لِسَانٌ عَرَبِىٌّ مُّبِينٌ ﴿١٠٤﴾

104. තවද ඔහුට එය උගන්වන්නේ හුදෙක් මිනිසෙක් යැයි ඔවුන් පවසන බව අපි ඇත්තෙන්ම දනිමු. ඔවුන් ආරෝපණය කරන ඔහුගේ බස පිටස්තරයකි. නමුත් මෙය සරල සහ පැහැදිලි අරාබි බස වේ.

إِنَّ ٱلَّذِينَ لَا يُؤْمِنُونَ بِـَٔايَٰتِ ٱللَّهِ ۙ لَا يَهْدِيهِمُ ٱللَّهُ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿١٠٥﴾

105. අල්ලාහ්ගේ සලකුණු කෙරෙහි විශ්වාස නොකරන අය ගත්කල නියතවශයෙන්ම අල්ලාහ් ඔවුනට මග නොපෙන්වන්නේය. තවද ඔවුනට වේදනීය දඬුවමක් ලැබෙනු ඇත.

إِنَّمَا يَفْتَرِى ٱلْكَذِبَ ٱلَّذِينَ لَا يُؤْمِنُونَ بِـَٔايَٰتِ ٱللَّهِ ۖ وَأُو۟لَٰٓئِكَ هُمُ ٱلْكَٰذِبُونَ ﴿١٠٦﴾

106. අල්ලාහ්ගේ සලකුණු කෙරෙහි විශ්වාස නොකරන අයම බොරු ගොතන්නන් වෙති. තවද මොවුහුම මුසාවාදීන් වෙති.

مَن كَفَرَ بِٱللَّهِ مِنۢ بَعْدِ إِيمَٰنِهِۦٓ إِلَّا مَنْ أُكْرِهَ وَقَلْبُهُۥ مُطْمَئِنٌّۢ بِٱلْإِيمَٰنِ وَلَٰكِن مَّن شَرَحَ بِٱلْكُفْرِ صَدْرًا فَعَلَيْهِمْ غَضَبٌ مِّنَ ٱللَّهِ وَلَهُمْ عَذَابٌ عَظِيمٌ ﴿١٠٧﴾

107. කවුරුන් හෝ සිය හදවත විශ්වාසයෙහි තෘප්තිමත්ව තිබියදී බලපෑමට ලක් කරනු ලබන්නේද ඔවුන් හැර, එහෙත් කවුරුන් හෝ තම විශ්වාසයෙන් පසුව අල්ලාහ් කෙරෙහි අවිශ්වාස කරන්නේද එමෙන්ම කවුරුන් හෝ තම හදවත අවිශ්වාසයට විවෘත කරන්නේද ඔවුන් මත අල්ලාහ්ගේ උදහස වේ. තවද ඔවුනට මහත්වූ දඬුවමක් ලැබෙනු ඇත.

ذَٰلِكَ بِأَنَّهُمُ ٱسْتَحَبُّوا۟ ٱلْحَيَوٰةَ ٱلدُّنْيَا عَلَى ٱلْءَاخِرَةِ ۙ وَأَنَّ ٱللَّهَ لَا يَهْدِى ٱلْقَوْمَ ٱلْكَٰفِرِينَ ﴿١٠٨﴾

108. එයට හේතුව ඔවුන් පරලොවට වඩා මෙලොව ජීවිතයට වැඩි කැමැත්තක් දක්වා ඇති හෙයින්ද තවද අවිශ්වාසිත ජනතාවට අල්ලාහ් මග නොපෙන්වන හෙයින්ද වේ.

أُولَٰئِكَ الَّذِينَ طَبَعَ اللَّهُ عَلَىٰ قُلُوبِهِمْ وَسَمْعِهِمْ وَأَبْصَارِهِمْ ۖ وَأُولَٰئِكَ هُمُ الْغَافِلُونَ ﴿١٠٩﴾

109. ඔවුන්ගේ හදවත්හිද ඔවුන්ගේ කන්හිද ඔවුන්ගේ ඇස්හිද අල්ලාහ් මුද්‍රා තැබුවේය. තවද නොතකන්නන් වන්නේ ඔවුන්මය.

لَا جَرَمَ أَنَّهُمْ فِي الْآخِرَةِ هُمُ الْخَاسِرُونَ ﴿١١٠﴾

110. නිසැකවම පරලොවෙහි පරාජිත වන්නන් මොවුහුම වෙති.

ثُمَّ إِنَّ رَبَّكَ لِلَّذِينَ هَاجَرُوا مِنْ بَعْدِ مَا فُتِنُوا ثُمَّ جَاهَدُوا وَصَبَرُوا إِنَّ رَبَّكَ مِنْ بَعْدِهَا لَغَفُورٌ رَحِيمٌ ﴿١١١﴾ ع

111. එසේම වද හිංසාවට ලක්වීමෙන් පසු (සිය නිවෙස්) අත්හැර පසුව (අල්ලාහ්ගේ මාර්ගයෙහි) දැඩිව පරිශ්‍රමයේ යෙදෙමින් ස්ථිරසාරව වූ අයහට නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් (සිටින්නේ)ය. නියතවශයෙන්ම මින්පසුවත් ඔබගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

يَوْمَ تَأْتِي كُلُّ نَفْسٍ تُجَادِلُ عَنْ نَفْسِهَا وَتُوَفَّىٰ كُلُّ نَفْسٍ مَا عَمِلَتْ وَهُمْ لَا يُظْلَمُونَ ﴿١١٢﴾

112. එදින සෑම ආත්මයක්ම තමන් වෙනුවෙන් ආයාචනා කරමින් පැමිණෙයි. තවද සෑම ආත්මයක්ම එය කළ දේ වෙනුවෙන් සම්පූර්ණ ඵලවිපාක ලබන්නේය. තවද ඔවුනට වැරදි නොකරනු ලබන්නේය.

وَضَرَبَ اللَّهُ مَثَلًا قَرْيَةً كَانَتْ آمِنَةً مُطْمَئِنَّةً يَأْتِيهَا رِزْقُهَا رَغَدًا مِنْ كُلِّ مَكَانٍ فَكَفَرَتْ بِأَنْعُمِ اللَّهِ فَأَذَاقَهَا اللَّهُ لِبَاسَ الْجُوعِ وَالْخَوْفِ بِمَا كَانُوا يَصْنَعُونَ ﴿١١٣﴾

113. සාමය සහ ආරක්ෂාව භුක්ති විඳින්නාවූ නගරයක් පිළිබඳව උපමාවක් අල්ලාහ් ගෙන හැර දක්වයි. එයට ජීවනෝපායන් සෑම තැනකින්ම බහුලව පැමිණුනි. නමුත් එය අල්ලාහ්ගේ අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කළේය. එබැවින් අල්ලාහ් එහි වැසියන්ට ඔවුන් කරමින් සිටි දෙයෙහි ප්‍රතිඵලයක් ලෙස, කුසගින්නෙන් හා භීතියෙන් වෙළා ගත්තාවූ ජීවිතයක් විඳීමට සැලැස්විය.

وَلَقَدْ جَاءَهُمْ رَسُولٌ مِنْهُمْ فَكَذَّبُوهُ فَأَخَذَهُمُ الْعَذَابُ وَهُمْ ظَالِمُونَ ﴿١١٤﴾

114. තවද ඇත්තෙන්ම ඔවුන් අතරින් දූතයෙක් ඔවුන් වෙත පැමිණ ඇත. එහෙත් ඔවුහු ඔහුව මුසාවාදියෙකු ලෙස සැලකූහ. එබැවින් ඔවුන් වරදකරුවන්ව සිටියදී දඬුවම ඔවුන්ව හසු කර ගත්තේය.

فَكُلُوا مِمَّا رَزَقَكُمُ اللَّهُ حَلَالًا طَيِّبًا وَاشْكُرُوا نِعْمَتَ اللَّهِ إِن كُنتُمْ إِيَّاهُ تَعْبُدُونَ ﴿١١٥﴾

115. එබැවින් අල්ලාහ් නුඹලාට ලබා දී ඇති නීත්‍යානුකූල සහ යහපත් දෙයින් අනුභව කරනු. එමෙන්ම නුඹලා ඔහුටම නමදින්නේ නම් අල්ලාහ්ගේ අනුග්‍රහයට කෘතගුණ දක්වනු.

إِنَّمَا حَرَّمَ عَلَيْكُمُ الْمَيْتَةَ وَالدَّمَ وَلَحْمَ الْخِنزِيرِ وَمَا أُهِلَّ لِغَيْرِ اللَّهِ بِهِ ۖ فَمَنِ اضْطُرَّ غَيْرَ بَاغٍ وَلَا عَادٍ فَإِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿١١٦﴾

116. ඔහු(අල්ලාහ්) නුඹලාට නීතියෙන් තහනම් කර ඇත්තේ ඉබේම මළ ඒවායේ මාංශද රුධිරයද සූකර මාංශද අල්ලාහ් හැර අන් දෙයක නාමය යදින ලද දේවල්ම වේ. නමුත් කෙනෙකු අතිශය කැමැත්තෙන් තොරව සීමාව නොඉක්මවීමේ අදහසින් සිටින කල්හි දැඩි අවශ්‍යතාවයකින් පෙළෙනු ලැබුවහොත් (ඔහුට පවක් නැත). එවිට නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَلَا تَقُولُوا لِمَا تَصِفُ أَلْسِنَتُكُمُ الْكَذِبَ هَٰذَا حَلَالٌ وَهَٰذَا حَرَامٌ لِّتَفْتَرُوا عَلَى اللَّهِ الْكَذِبَ ۚ إِنَّ الَّذِينَ يَفْتَرُونَ عَلَى اللَّهِ الْكَذِبَ لَا يُفْلِحُونَ ﴿١١٧﴾

117. තවද නුඹලා අල්ලාහ්ට එරෙහිව බොරු ගොතනු පිණිස නුඹලාගේ දිව් දොඩන බොරුව හේතුවෙන් 'මෙය නීත්‍යානුකූලය තවද මෙය අනීත්‍යානුකූලයැ'යි නොකියනු. නියතවශයෙන්ම අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන අය ජය නොලබන්නෝය.

مَتَاعٌ قَلِيلٌ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿١١٨﴾

118. සුළු භුක්ති විඳීමකි. තවද ඔවුනට වේදනීය දඬුවමක් ලැබෙනු ඇත.

وَعَلَى الَّذِينَ هَادُوا حَرَّمْنَا مَا قَصَصْنَا عَلَيْكَ مِن قَبْلُ ۖ وَمَا ظَلَمْنَاهُمْ وَلَٰكِن كَانُوا أَنفُسَهُمْ يَظْلِمُونَ ﴿١١٩﴾

119. තවද නුඹලා වෙත අප විස්තර කර ඇති දේ සියල්ලක්ම (මීට) පෙර යුදෙව්වරුන්ට(ද) අපි තහනම් කළෙමු. තවද අපි ඔවුනට වැරදි නොකළෙමු. එහෙත් ඔවුන් තමන්ටම වැරදි කරගත්හ.

ثُمَّ اِنَّ رَبَّكَ لِلَّذِيْنَ عَمِلُوا السُّوْٓءَ بِجَهَالَةٍ ثُمَّ تَابُوْا مِنْ بَعْدِ ذٰلِكَ وَاَصْلَحُوْٓا ۙ اِنَّ رَبَّكَ مِنْ بَعْدِهَا لَغَفُوْرٌ رَّحِيْمٌ ﴿١٢٠﴾

120. එසේම නොදැනුවත්කමින් නපුරුකම් කර පසුව පසුතැවිලි වෙමින් නිවැරදි කරගන්නා අය හට නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් (සිටින්නේ)ය. මින්පසුවත් නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

اِنَّ اِبْرٰهِيْمَ كَانَ اُمَّةً قَانِتًا لِّلّٰهِ حَنِيْفًا ؕ وَلَمْ يَكُ مِنَ الْمُشْرِكِيْنَ ۙ﴿١٢١﴾

*121. ඉබ්රාහීම් (තමන්ම) ජන සමාජයක් විය. සැමවිටම අල්ලාහ්ට අවනත වන්නෙක්ද, සදා (ඔහු වෙත) නැඹුරුවන්නෙක්ද විය. ඇත්තෙන්ම ඔහු ප්‍රතිමා පුදන්නන්ගෙන් නොවිය.

شَاكِرًا لِّاَنْعُمِهٖ ؕ اِجْتَبٰهُ وَهَدٰىهُ اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿١٢٢﴾

122. ඔහුගේ (අල්ලාහ්ගේ) අනුග්‍රහයන්ට සදා කෘතඥ විය. ඔහු ඔහුව තෝරාගත්තේය. තවද ඔහුව ඍජු මග වෙත යොමු කළේය.

وَاٰتَيْنٰهُ فِى الدُّنْيَا حَسَنَةً ؕ وَاِنَّهٗ فِى الْاٰخِرَةِ لَمِنَ الصّٰلِحِيْنَ ؕ﴿١٢٣﴾

123. තවද අපි ඔහුට මෙලොවෙහි යහපත පිරිනැමුවෙමු. තවද පරලොවෙහි ඔහු නියතවශයෙන්ම ධාර්මිෂ්ඨකයින් අතර වන්නේය.

ثُمَّ اَوْحَيْنَآ اِلَيْكَ اَنِ اتَّبِعْ مِلَّةَ اِبْرٰهِيْمَ حَنِيْفًا ؕ وَمَا كَانَ مِنَ الْمُشْرِكِيْنَ ﴿١٢٤﴾

124. තවද 'නිරතුරුවම (දෙවියන් වෙත) නැඹුරුවූ ඉබ්රාහීම්ගේ මාර්ගය අනුගමනය කරන්න. තවද ඔහු (අල්ලාහ්ට) සමාන තබන්නන්ගෙන් කෙනෙක් නොවියැ'යි (පවසමින්) (දැන්) අපි ඔබ වෙත අනාවරණය කර ඇත්තෙමු.

*සටහන. 121: 'ඉබ්රාහීම් තමන්ම ජන සමාජයක් විය' යන්නෙන් අදහස් කරන්නේ ඔහුට පොරොන්දු දෙන ලද ශ්‍රේෂ්ඨ ජාතියක් ගොඩනැගීමේ හැකියාවද ඊට අවශ්‍ය බීජයද ඔහු තුල තිබූ බවය.

| | |
|---|---|
| *125. සබත් පනවන ලද්දේ ඔහු (ඉබ්රාහිම් සහ ඔහුගේ ආගම)ගැන වෙනස් මත දරන අය කෙරෙහිය. තවද ඔබගේ අධිපතියාණන් නියතවශයෙන්ම පුනරුත්ථාන දිනයේදී ඔවුන් වෙනස් මත දැරූ දේ සම්බන්ධයෙන් ඔවුනතර විනිශ්චය කරන්නේය. | اِنَّمَا جُعِلَ السَّبْتُ عَلَى الَّذِيْنَ اخْتَلَفُوْا فِيْهِ ؕ وَاِنَّ رَبَّكَ لَيَحْكُمُ بَيْنَهُمْ يَوْمَ الْقِيٰمَةِ فِيْمَا كَانُوْا فِيْهِ يَخْتَلِفُوْنَ ۝١٢٥ |
| 126. ප්‍රඥාවෙන් යුතුවද යහපත් අනුශාසනා මගින්ද ඔබගේ අධිපතියාණන්ගේ මාර්ගය වෙත කැඳවන්න. තවද ඉතා යහපත් වූ ආකාරයෙන් ඔවුන් හා තර්ක කරන්න. ඔහුගේ මාර්ගයෙන් නොමග ගිය අයව නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් මැනැවින් දනියි. තවද යහමග ලද අයවද ඔහු දනියි. | اُدْعُ اِلٰى سَبِيْلِ رَبِّكَ بِالْحِكْمَةِ وَالْمَوْعِظَةِ الْحَسَنَةِ وَجَادِلْهُمْ بِالَّتِيْ هِيَ اَحْسَنُ ؕ اِنَّ رَبَّكَ هُوَ اَعْلَمُ بِمَنْ ضَلَّ عَنْ سَبِيْلِهٖ وَهُوَ اَعْلَمُ بِالْمُهْتَدِيْنَ ۝١٢٦ |
| 127. තවද නුඹලා (හිංසාකරුවන්ට) දඬුවම් කිරීමට (අදහස් කරන්නේ) නම් නුඹලාට කරන ලද වරදේ ප්‍රමාණයට (ඔවුනට) දඬුවම් කරනු. එහෙත් නුඹලා ඉවසන්නේ නම් එය නියතවශයෙන්ම ඉවසිලිවන්තයින්ට ඉතා යහපත්ය. | وَاِنْ عَاقَبْتُمْ فَعَاقِبُوْا بِمِثْلِ مَا عُوْقِبْتُمْ بِهٖ ؕ وَلَئِنْ صَبَرْتُمْ لَهُوَ خَيْرٌ لِّلصّٰبِرِيْنَ ۝١٢٧ |
| 128. තවද ඔබ ඉවසිලිමත්ව සිටින්න. සැබැවින්ම ඔබගේ ඉවසිලිවන්ත බව අල්ලාහ්ගේ පිහිටෙන්ම පමණක් (විය හැකි)ය. තවද ඔවුන් වෙනුවෙන් කනස්සල්ලට පත් නොවන්න. තවද ඔවුන්ගේ කුමන්ත්‍රණයන් හේතුවෙන් දුකටද පත්නොවන්න. | وَاصْبِرْ وَمَا صَبْرُكَ اِلَّا بِاللّٰهِ وَلَا تَحْزَنْ عَلَيْهِمْ وَلَا تَكُ فِيْ ضَيْقٍ مِّمَّا يَمْكُرُوْنَ ۝١٢٨ |
| 129. සැබැවින්ම අල්ලාහ් බියබැතිමතුන් සහ යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන් සමගය. | اِنَّ اللّٰهَ مَعَ الَّذِيْنَ اتَّقَوْا وَّالَّذِيْنَ هُمْ مُّحْسِنُوْنَ ۝١٢٩ ع |

*සටහන. 125: මෙහි සඳහන් වන අදහස පැහැදිලිය. එනම් ඉබ්රාහිම් සහ ඔහුගේ එකම දෙවියන්ට පෙන්වන කැපවීමද නොසැලවිය හැකි පරිත්‍යාගයද මිස අන් කිසිවක් මෙහිදී විග්‍රහ කිරීමක් නොවේ. එම නිසා මෙහි පෙන්වාදෙනු ලබන්නේ ඉබ්රාහිම් සහ ඔහුගේ සත්‍ය විශ්වාසය හා ගති පැවතුම් පිළිබඳව ඉස්රාඊල්වරුන් අතර වූ මත භේදය සම්බන්ධවය. ඔවුන් අතර වැඩි දෙනෙක් විවිධාකාරයේ ප්‍රතිමා පිදීම් වලට හසුවී සිටි බැවින් ඔවුන්ගේ මෙම පිළිවෙතට නිදහසට හේතු දැක්වීම පිණිස එය ඉබ්රාහිම්ටද සම්බන්ධ කරන්නට ඇත. මෙම පසුබිමෙහි සබත් යන්නෙහි පෙනියන්නේ විවේක දිනයක් පමණක් නොව පවිත්‍රවීමේ සහ පසුතැවිලිවීමේ දිනයක්ද වන බවය.




بනි ඉස්රාඊල්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

سُبۡحٰنَ الَّذِىۡۤ اَسۡرٰى بِعَبۡدِهٖ لَيۡلًا مِّنَ الۡمَسۡجِدِ الۡحَـرَامِ اِلَى الۡمَسۡجِدِ الۡاَقۡصَا الَّذِىۡ بٰرَكۡنَا حَوۡلَهٗ لِنُرِيَهٗ مِنۡ اٰيٰتِنَا ؕ اِنَّهٗ هُوَ السَّمِيۡعُ الۡبَصِيۡرُ ﴿٢﴾

15-කොටස

2. ශුද්ධ වූ නැමදුම් ස්ථානයේ සිට දුරස්තර නැමදුම් ස්ථානය වෙත සිය දාසයාව රාත්‍රියේදී රැගෙන ගිය ඔහු සුවිශුද්ධය. අපගේ (සමහර) සළකුණු ඔහුට පෙන්වනු පිණිස අපි එ(දුරස්තර වූ නැමදුම් ස්ථානය)හි අවට පරිසරය ආශිර්වාද කළෙමු. නියතවශයෙන්ම ඔහුම මැනැවින් අසන්නාය, මැනවින් දකින්නාය.

وَاٰتَيۡنَا مُوۡسَى الۡـكِتٰبَ وَجَعَلۡنٰهُ هُدًى لِّبَنِىۡۤ اِسۡرَآءِيۡلَ اَلَّا تَتَّخِذُوۡا مِنۡ دُوۡنِىۡ وَكِيۡلًا ؕ ﴿٣﴾

3. තවද අපි මූසාට පුස්තකය දුන්නෙමු. තවද 'මා හැරෙන්නට කිසිවෙකුව භාරකරුවෙකු ලෙස නොගනු'යි (පවසමින්) අපි ඉස්රාඊලයේ දරුවන්ට එය මගපෙන්වීමක් කළෙමු.

ذُرِّيَّةَ مَنۡ حَمَلۡنَا مَعَ نُوۡحٍ ؕ اِنَّهٗ كَانَ عَبۡدًا شَكُوۡرًا ﴿٤﴾

4. නූහ් සමග (නැවෙහි) අප රැගෙන ගිය අයගේ පැවත එන්නන් (නුඹලාම)ය. ඇත්තෙන්ම ඔහු කෘතගුණ දක්වන දාසයෙක් විය.

وَقَضَيۡنَاۤ اِلٰى بَنِىۡۤ اِسۡرَآءِيۡلَ فِى الۡـكِتٰبِ لَـتُفۡسِدُنَّ فِى الۡاَرۡضِ مَرَّتَيۡنِ وَلَتَعۡلُنَّ عُلُوًّا كَبِيۡرًا ﴿٥﴾

*5. තවද අපි ඉස්රාඊලයේ දරුවන් වෙත 'නියතවශයෙන්ම නුඹලා භූමියෙහි දෙවරක් ආරවුල් කරන්නෝය. තවද නුඹලා නියතවශයෙන්ම අධිකව අහංකාර වන්නෝමයැ'යි (පවසමින්) එම පුස්තකයෙහි හෙළිදරව් කළෙමු.

فَاِذَا جَآءَ وَعۡدُ اُوۡلٰٮهُمَا بَعَثۡنَا عَلَيۡكُمۡ عِبَادًا لَّنَاۤ اُولِىۡ بَاۡسٍ شَدِيۡدٍ فَجَاسُوۡا

6. එබැවින් ඒ දෙකෙන් පළමුවන අනතුරු ඇඟවීම ඉටුවීමේ අවස්ථාව පැමිණි විට යුධ ශක්තියෙන් යුත් අපගේ (සමහර) දාසයින්ව අපි නුඹලාට එරෙහිව එව්වෙමු. ඒ අය

خِلٰلَ الدِّيَارِ ۗ وَكَانَ وَعْدًا مَّفْعُوْلًا ۝٦

ඔවුන්ගේ නිවෙස් අභ්‍යන්තරයට කා වැදුණහ. එය ඉටුවීමට නියම කරන ලද අනතුරු ඇඟවීමක් විය.

ثُمَّ رَدَدْنَا لَكُمُ الْكَرَّةَ عَلَيْهِمْ وَاَمْدَدْنٰكُمْ بِاَمْوَالٍ وَّبَنِيْنَ وَجَعَلْنٰكُمْ اَكْثَرَ نَفِيْرًا ۝٧

7. පසුව අපි ඔවුනට එරෙහිව නුඹලාට බලය ආපසු දුන්නෙමු. තවද ධනය හා දරුවන් මගින් නුඹලාට උදව් කළෙමු. තවද නුඹලාව සංඛ්‍යාවෙන් වැඩි කළෙමු.

اِنْ اَحْسَنْتُمْ اَحْسَنْتُمْ لِاَنْفُسِكُمْ ۗ وَاِنْ اَسَاْتُمْ فَلَهَا ۗ فَاِذَا جَآءَ وَعْدُ الْاٰخِرَةِ لِيَسُوْٓءٗا وُجُوْهَكُمْ وَلِيَدْخُلُوا الْمَسْجِدَ كَمَا دَخَلُوْهُ اَوَّلَ مَرَّةٍ وَّلِيُتَبِّرُوْا مَا عَلَوْا تَتْبِيْرًا ۝٨

8. නුඹලා යහපත් ක්‍රියා කරන්නේ නම් එය නුඹලා නුඹලාගේ ආත්මයන්ටම යහපත කරගන්නෙහුය. තවද නුඹලා අයහපත් ක්‍රියා කරන්නේ නම් එය(නුඹලාගේ ආත්මයන්)ටමය. එබැවින් දෙවැනි පොරොන්දු වූ මොහොත පැමිණෙන විට ඔවුන් නුඹලාගේ අයහට අවමානය කරනු පිණිසද නැමදුම් ස්ථානයට ඔවුන් එහි පළමුවරට ඇතුළු වූවා සේ ඇතුළු වී ඒ අය අත්පත් කරගෙන සිටි සියල්ල මුළුමනින්ම විනාශ කරනු පිණිසද (අපි ඔවුන්ව යැව්වෙමු).

عَسٰى رَبُّكُمْ اَنْ يَّرْحَمَكُمْ ۚ وَاِنْ عُدْتُّمْ عُدْنَا ۘ وَجَعَلْنَا جَهَنَّمَ لِلْكٰفِرِيْنَ حَصِيْرًا ۝٩

9. නුඹලාගේ අධිපතියාණන් (දැන්) නුඹලා කෙරෙහි දයාව දක්වන්නට පුළුවන. එහෙත් නුඹලා (නුඹලාගේ කලින් සිටි තත්වයට) ආපසු හැරුන හොත් අපි(ද) ආපසු හැරෙන්නෙමු. තවද අපි නිරය අවිශ්වාසිතයින් හට සිරගෙයක් කර ඇත්තෙමු.

*සටහන. 5 සිට 9: ඉස්රාඊල් දරුවන් පිළිබඳව දෙවියන්ගේ නියමය මෙසේ ක්‍රියාත්මක වූයේය. එනම් ඔවුන් අයහපත් ක්‍රියාවන්හි සීමාව ඉක්මවූ බැවින් ඔවුන්ට එරෙහිව බැබිලෝනියාවේ රජු නබූකත් නසර්ට ජයග්‍රහණය හිමිවිය. ඔවුන්ගේ මංමාවත් තුළ පවා ඔවුන් කා වැදුණහ. තවද ඔවුන්ව විනාශ කර දැමූහ. තවද ඔවුන් සංක්‍රමණය මගින් රටින් පිටවීමේ බලපෑමටද ලක්වූහ. පසුව අල්ලාහ් පළමුව ඉස්රාඊල් දරුවන්ට දෙවැනි වරටත් පලස්තීනයෙහි ජයග්‍රහණය ලබාදුන් විට ඔවුන්ට කරුණාව දක්වමින් ඔවුන්ගේ ජනගහනය කෙරෙහිද ආශිර්වාද කළේය. තවද ඔවුන්ගේ සම්පත්හිද ආශිර්වාද කළේය. තවද 'නුඹලා යහකම් කළහොත් නුඹලාට ප්‍රයෝජනය ලැබෙනු ඇත. තවද නුඹලා පෙර සේම අයහපත් ක්‍රියා කළහොත් නුඹලා තමන්ගේ ප්‍රයෝජනයට එරෙහිව ක්‍රියා කරන්නෝය'යි අවවාද කළේය. තවද මතු කාලයේදී ඔවුන්ට පලස්තීනයේ නැවතත් ජයග්‍රහණය ලැබෙන විට එයට හේතුව වන්නේ පලස්තීනය අත්පත් කරගෙන සිටි මුස්ලිම්වරුන්ගේ අයහපත් ක්‍රියාවන් නිසාය. තවද යුදෙව්වරුන්ව නැවතත් පරීක්ෂාවට ලක් කරනු ලැබේ. ඔවුන් අත්පත් කළ ප්‍රදේශවල නීතිය සහ කරුණාවෙන් යුතුව කටයුතු කළහොත් ඔවුන්ට මෙම ජයග්‍රහණය දීර්ඝ වනු ඇත. තවද එහි ප්‍රතිඵලයක් වශයෙන් කිසිම ජනසමාජයක් ඔවුන්ව පරාජයට පත් කළ නොහැකි වන්නේය. නමුත් අල්ලාහ් තම නියමයෙන් මෙවැනි වාතාවරණයක් ඇති කරන්නේය. එනම් විශාල අධිරාජ්‍යයන් පවා යුදෙව්වන්ට පලස්තීනයේ රැකවරණය දීමට පසු බසින්නෝය.

10. නියතවශයෙන්ම මෙම කුර්ආනය වඩාත්ම නිවැරදි දෙය වෙත මග පෙන්වයි. තවද යහපත් ක්‍රියාවන් කරන විශ්වාසිතයින්ට මහත් වූ තිළිණය ලැබෙන බව ඔවුනට ශුභාරංචි දෙන්නේය.

إِنَّ هَٰذَا الْقُرْآنَ يَهْدِي لِلَّتِي هِيَ أَقْوَمُ وَيُبَشِّرُ الْمُؤْمِنِينَ الَّذِينَ يَعْمَلُونَ الصَّالِحَاتِ أَنَّ لَهُمْ أَجْرًا كَبِيرًا ﴿١٠﴾

11. තවද මතු පැමිණෙන්නාවූ දේ ගැන විශ්වාසය නොකරන අය වෙනුවෙන්ද අපි වේදනීය දඬුවමක් පිළියෙල කොට ඇත්තෙමු.

وَأَنَّ الَّذِينَ لَا يُؤْمِنُونَ بِالْآخِرَةِ أَعْتَدْنَا لَهُمْ عَذَابًا أَلِيمًا ﴿١١﴾

12. තවද මිනිසා යහපත සඳහා ආයාචනා කරන ආකාරයටම ඔහු අයහපත සඳහාද ආයාචනා කරයි. තවද මිනිසා ඉක්මන්කාරීය.

وَيَدْعُ الْإِنْسَانُ بِالشَّرِّ دُعَاءَهُ بِالْخَيْرِ ۖ وَكَانَ الْإِنْسَانُ عَجُولًا ﴿١٢﴾

13. තවද අපි රාත්‍රිය හා දහවල සලකුණු දෙකක් ලෙස කර ඇත්තෙමු. තවද අපි රාත්‍රියේ සලකුණ මකා දමමින් දවාලේ සලකුණ අප දීප්තිමත් කර ඇත්තේ නුඹලාගේ අධිපතියාණන්ගෙන් නුඹලා වරප්‍රසාදය සොයනු පිණිසද නුඹලා වර්ෂ ගණනද (කාලය) ගණන් ගැනීමේ(විද්‍යාව)ද දැනගනු පිණිසද වේ. තවද අපි සැමදෙයක්ම සවිස්තරාත්මකව විස්තර කර ඇත්තෙමු.

وَجَعَلْنَا اللَّيْلَ وَالنَّهَارَ آيَتَيْنِ ۖ فَمَحَوْنَا آيَةَ اللَّيْلِ وَجَعَلْنَا آيَةَ النَّهَارِ مُبْصِرَةً لِتَبْتَغُوا فَضْلًا مِنْ رَبِّكُمْ وَلِتَعْلَمُوا عَدَدَ السِّنِينَ وَالْحِسَابَ ۚ وَكُلَّ شَيْءٍ فَصَّلْنَاهُ تَفْصِيلًا ﴿١٣﴾

14. තවද සැම මිනිසෙකුගේම ක්‍රියාවල වාර්තාව අපි ඔහුගේ ගෙලෙහි බැඳ ඇත්තෙමු. තවද අපි පුනරුත්ථාන දිනයේදී ඔහු විවෘතව දකින පොතක් ඔහුට ගෙනහැර පාන්නෙමු.

وَكُلَّ إِنْسَانٍ أَلْزَمْنَاهُ طَائِرَهُ فِي عُنُقِهِ ۖ وَنُخْرِجُ لَهُ يَوْمَ الْقِيَامَةِ كِتَابًا يَلْقَاهُ مَنْشُورًا ﴿١٤﴾

15. 'නුඹගේ පොත කියවනු. මෙදින නුඹගේ ආත්මය නුඹට එරෙහිව ගණන් බැලීම සඳහා ප්‍රමාණවත්ය'.

اقْرَأْ كِتَابَكَ كَفَىٰ بِنَفْسِكَ الْيَوْمَ عَلَيْكَ حَسِيبًا ﴿١٥﴾

16. කවරෙකු හෝ යහමග අනුගමනය කරන්නේද එසේ අනුගමනය කරන්නේ තම ආත්මයේ (යහපත) සඳහාම වේ. තවද

مَنِ اهْتَدَىٰ فَإِنَّمَا يَهْتَدِي لِنَفْسِهِ ۖ وَمَنْ ضَلَّ فَإِنَّمَا يَضِلُّ عَلَيْهَا ۚ وَلَا تَزِرُ وَازِرَةٌ

කවරෙකු හෝ නොමග යන්නේද ඔහු තමන්ටම හානි කරගන්නේය. තවද බර උසුලන කවරෙකු හෝ අනෙකුගේ බර නොඋසුලන්නේය. තවද අප දූතයෙකු එවන තුරු අපි කිසිවිටෙකත් දඬුවම් නොකරන්නෙමු.

وِّزْرَ اُخْرٰى ؕ وَمَا كُنَّا مُعَذِّبِيْنَ حَتّٰى نَبْعَثَ رَسُوْلًا ﴿١٦﴾

17. තවද අප නගරයක් විනාශ කිරීමට අපේක්ෂා කරන විට එහි (වෙසෙන) සමෘද්ධිමතුන්ට (ඔවුනතර රිසිලෙස ක්‍රියා කිරීමට) අපි ඉඩ හරින්නෙමු. එබැවින් එය මත අත්වන්නාවූ ඉරණම තීරණය කරනු ලබන තුරු, ඔවුහු එහි පාපයේ සියලු හැසිරීම්හි ගිලීහී සිටිති. පසුව අපි එය සහමුලින්ම විනාශ කර දමන්නෙමු.

وَاِذَاۤ اَرَدْنَاۤ اَنْ نُّهْلِكَ قَرْيَةً اَمَرْنَا مُتْرَفِيْهَا فَفَسَقُوْا فِيْهَا فَحَقَّ عَلَيْهَا الْقَوْلُ فَدَمَّرْنٰهَا تَدْمِيْرًا ﴿١٧﴾

18. නූහ්ගෙන් පසුව අපි කොතරම් පරම්පරාවන් විනාශ කර ඇත්තෙමු!. තවද ඔබගේ අධිපතියාණන් සිය දාසයින්ගේ පාපයන් පිළිබඳව දත්තා මෙන්ම දකින්නා ලෙස ප්‍රමාණවත්ය.

وَكَمْ اَهْلَكْنَا مِنَ الْقُرُوْنِ مِنْۢ بَعْدِ نُوْحٍ ؕ وَكَفٰى بِرَبِّكَ بِذُنُوْبِ عِبَادِهٖ خَبِيْرًاۢ بَصِيْرًا ﴿١٨﴾

19. කවරෙකු හෝ ලෞකික ජීවිතය ප්‍රිය කරන්නේද එවැන්නන්ට අප කැමති පරිදි අපි අභිමත කරන දේ ඔහුට මෙහිදී ලබා දීමට අපි කඩිනම් වෙමු. පසුව අපි ඔහුට නිරය නියම කර ඇත්තෙමු. ඔහු නින්දිතවද ප්‍රතික්ෂේපිතවද එහි ඇතුළු වන්නේය.

مَنْ كَانَ يُرِيْدُ الْعَاجِلَةَ عَجَّلْنَا لَهٗ فِيْهَا مَا نَشَآءُ لِمَنْ نُّرِيْدُ ثُمَّ جَعَلْنَا لَهٗ جَهَنَّمَ ۚ يَصْلٰىهَا مَذْمُوْمًا مَّدْحُوْرًا ﴿١٩﴾

20. තවද කවරෙකු හෝ පරලොව ප්‍රිය කරමින් ඒ වෙනුවෙන් පරිශ්‍රමය කළයුතු ආකාරයට පරිශ්‍රමය කළේද, තවද ඔහු විශ්වාසිතයෙකුද වන්නේ නම් එවැන්නන්ගේ පරිශ්‍රමය අගය කරනු ලබන්නේය.

وَمَنْ اَرَادَ الْاٰخِرَةَ وَسَعٰى لَهَا سَعْيَهَا وَهُوَ مُؤْمِنٌ فَاُولٰٓئِكَ كَانَ سَعْيُهُمْ مَّشْكُوْرًا ﴿٢٠﴾

21. මොවුන්ටත් ඔවුන්ටත් සියළුදෙනාටත් ඔබගේ අධිපතියාණන්ගේ දායාදයෙන් අපි උපකාර කරන්නෙමු. තවද ඔබ අධිපතියාණන්ගේ දායාදය වැළැක්විය නොහැක්කක්ය.

كُلًّا نُّمِدُّ هٰۤؤُلَآءِ وَهٰۤؤُلَآءِ مِنْ عَطَآءِ رَبِّكَ ؕ وَمَا كَانَ عَطَآءُ رَبِّكَ مَحْظُوْرًا ﴿٢١﴾

اُنْظُرْ كَيْفَ فَضَّلْنَا بَعْضَهُمْ عَلٰى بَعْضٍ ؕ وَلَلْاٰخِرَةُ اَكْبَرُ دَرَجٰتٍ وَّ اَكْبَرُ تَفْضِيْلًا ﴿۲۲﴾

22. අප ඔවුන්ගෙන් සමහරුන්ව තවත් සමහරුන්ට වඩා ඉහළින් (මෙලොව ජීවිතයේදී) උසස් කර ඇත්තේ කෙසේදැයි බලන්න! තවද නියතවශයෙන්ම පරලොව තරාතිරම් අති ශ්‍රේෂ්ඨ වන අතර විශිෂ්ටත්වයෙන්ද අති ශ්‍රේෂ්ඨය.

لَا تَجْعَلْ مَعَ اللّٰهِ اِلٰهًا اٰخَرَ فَتَقْعُدَ مَذْمُوْمًا مَّخْذُوْلًا ﴿۲۳﴾ ع

23. අල්ලාහ් සමග වෙනත් දෙවියකුව (නැමදීමට) නොගන්න. එසේ කළහොත් ඔබ නින්දාවටත් අත්හරිනු ලබන්නෙකු බවටත් පත්වනු ඇත.

وَقَضٰى رَبُّكَ اَلَّا تَعْبُدُوْۤا اِلَّاۤ اِيَّاهُ وَبِالْوَالِدَيْنِ اِحْسَانًا ؕ اِمَّا يَبْلُغَنَّ عِنْدَكَ الْكِبَرَ اَحَدُهُمَاۤ اَوْ كِلٰهُمَا فَلَا تَقُلْ لَّهُمَاۤ اُفٍّ وَّلَا تَنْهَرْهُمَا وَقُلْ لَّهُمَا قَوْلًا كَرِيْمًا ﴿۲۴﴾

24. ඔබගේ අධිපතියාණන්, "ඔහු හැර අන් කිසිවකුට නොනමදිනු. තවද දෙමාපියන්ට කරුණාව දක්වනු. තවද ඔවුන්ගෙන් එක් අයෙකු හෝ දෙදෙනාම හෝ ඔබ ළඟ මහළු වියට පත්වන්නේ නම් ඔවුන්ට 'ච්' යන පිළිකුළ උපදවන වදනක්වත් නොපවසනු. තවද ඔවුනට බැන නොවදිනු. තවද ඔවුන්ව කාරුණික වදනින් අමතනු"යි අණ කර ඇත.

وَاخْفِضْ لَهُمَا جَنَاحَ الذُّلِّ مِنَ الرَّحْمَةِ وَقُلْ رَّبِّ ارْحَمْهُمَا كَمَا رَبَّيٰنِيْ صَغِيْرًا ؕ ﴿۲۵﴾

25. "තවද ඔවුන් දෙදෙනාට දයාලුභාවයෙන් නිහතමානීව සලකනු. තවද 'මාගේ අධිපතියාණෙනි (මා) බාල වියේදී ඔවුන් මා පෝෂණය කළ ආකාරයෙන් ඔවුන් වෙත කරුණාව දක්වනු මැනවැ'යි පවසන්න".

رَبُّكُمْ اَعْلَمُ بِمَا فِيْ نُفُوْسِكُمْ ؕ اِنْ تَكُوْنُوْا صٰلِحِيْنَ فَاِنَّهٗ كَانَ لِلْاَوَّابِيْنَ غَفُوْرًا ﴿۲۶﴾

26. නුඹලාගේ සිත්තුල ඇති දේ නුඹලාගේ අධිපතියාණන් වඩාත් හොඳින් දනියි. නුඹලා ධාර්මිෂ්ඨකයින් වන්නේ නම් එවිට නියතවශයෙන්ම (පසුතැවිලි වී ඔහු වෙත) යළි යළිත් හැරෙන්නන්ට ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය.

وَاٰتِ ذَا الْقُرْبٰى حَقَّهٗ وَالْمِسْكِيْنَ وَابْنَ السَّبِيْلِ وَلَا تُبَذِّرْ تَبْذِيْرًا ﴿۲۷﴾

27. තවද ඔබ කිට්ටු ඥාතියාට ඔහුට දිය යුත්ත දෙන්න. එසේම දුගියාටද මගියාටද (දෙන්න). තවද ප්‍රමාණය ඉක්මවමින් (ඔබගේ ධනය) නිකරුණේ නාස්ති නොකරන්න.

إِنَّ الْمُبَذِّرِينَ كَانُوٓا إِخْوَانَ الشَّيٰطِينِ ۖ وَكَانَ الشَّيْطٰنُ لِرَبِّهِۦ كَفُورًا ﴿٢٨﴾

28. නියතවශයෙන්ම නිකරුණේ නාස්ති කරන්නන් ෂෙයිතානුන්ගේ සොහොයුරන් වෙති. තවද ෂෙයිතාන් තම අධිපතියාණන්ට අකෘතඥය.

وَإِمَّا تُعْرِضَنَّ عَنْهُمُ ابْتِغَآءَ رَحْمَةٍ مِّن رَّبِّكَ تَرْجُوهَا فَقُل لَّهُمْ قَوْلًا مَّيْسُورًا ﴿٢٩﴾

29. ඔබ අධිපතියාණන්ගෙන් ඔබ අපේක්ෂා කරන දයාලුභාවය ලබාගැනීම සඳහා ඔබ ඔවුන්ගෙන් (ඥාතීන්ගෙන්) ඉවත්වන්නට සිදුවුණි නම් (එවිටත්) ඔවුනට කාරුණික වදනින් කථා කරන්න.

وَلَا تَجْعَلْ يَدَكَ مَغْلُولَةً إِلٰى عُنُقِكَ وَلَا تَبْسُطْهَا كُلَّ الْبَسْطِ فَتَقْعُدَ مَلُومًا مَّحْسُورًا ﴿٣٠﴾

30. තවද (දැඩි මසුරුකමින්) ඔබගේ අත ඔබගේ ගෙල වටා හිරකර නොගන්න. තවද (නිකරුණේ නාස්ති කරමින්) එය සම්පූර්ණයෙන් දිගු නොකරන්න. නැතහොත් ඔබ මුළුමනින්ම නින්දාවට (හා) නිෂ්ඵලවී විඩාවට පත්වනු ඇත.

إِنَّ رَبَّكَ يَبْسُطُ الرِّزْقَ لِمَن يَشَآءُ وَيَقْدِرُ ۚ إِنَّهُۥ كَانَ بِعِبَادِهِۦ خَبِيرًۢا بَصِيرًا ﴿٣١﴾ ع

31. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්, ඔහු කැමති කෙනෙකුට ජීවනෝපාය බහුලව දෙන්නේය. තවද (ඔහු කැමති කෙනෙකුට එය) අඩු කර දෙන්නේය. සැබැවින්ම ඔහු සිය දාසයින්ව මැනැවින් දන්නේය, දකින්නේය.

وَلَا تَقْتُلُوٓا أَوْلٰدَكُمْ خَشْيَةَ إِمْلٰقٍ ۖ نَّحْنُ نَرْزُقُهُمْ وَإِيَّاكُمْ ۚ إِنَّ قَتْلَهُمْ كَانَ خِطْـًٔا كَبِيرًا ﴿٣٢﴾

32. දිළිඳුකමට බියෙන් නුඹලාගේ දරුවන්ව නුඹලා මරා නොදමනු. ඔවුන්ට මෙන්ම නුඹලාටද ජීවනෝපාය සපයා දෙන්නේ අපිමය. නියතවශයෙන්ම ඔවුන්ව මරා දැමීම මහත් පාපයකි.

وَلَا تَقْرَبُوا الزِّنٰىٓ ۖ إِنَّهُۥ كَانَ فٰحِشَةً وَسَآءَ سَبِيلًا ﴿٣٣﴾

33. තවද පරදාර සේවනයට ළං නොවනු. නියතවශයෙන්ම එය ඉතා අශික්ෂිත දෙයක් මෙන්ම දුෂ්ඨ මගකි.

وَلَا تَقْتُلُوا النَّفْسَ الَّتِى حَرَّمَ اللَّهُ إِلَّا بِالْحَقِّ ۗ وَمَن قُتِلَ مَظْلُومًا فَقَدْ جَعَلْنَا

34. තවද අල්ලාහ් තහනම් කර ඇති ජීවය යුක්ති සහගත හේතුවකින් තොරව මරා නොදමනු. යමෙකු වැරදි සහගතව මරනු ලැබුවේද අපි

لِوَلِيِّهٖ سُلْطٰنًا فَلَا يُسْرِفْ فِّي الْقَتْلِ ؕ اِنَّهٗ كَانَ مَنْصُوْرًا ﴿٣٤﴾

නියතවශයෙන්ම ඔහුගේ උරුමක්කාරයාට (පළි ගැනීමේ) බලය දී ඇත්තෙමු. නමුත් ඔහු ඝාතනයෙහි (පනවා ඇති) සීමාවන් නොඉක්මවිය යුතුය. ඇත්තෙන්ම ඔහු උදව් කරනු ලබන්නේය.

وَلَا تَقْرَبُوْا مَالَ الْيَتِيْمِ اِلَّا بِالَّتِيْ هِيَ اَحْسَنُ حَتّٰى يَبْلُغَ اَشُدَّهٗ ۪ وَاَوْفُوْا بِالْعَهْدِ ۚ اِنَّ الْعَهْدَ كَانَ مَسْـُٔوْلًا ﴿٣٥﴾

35. තවද, අනාථයාගේ දේපළ වෙත ඔහු තම වැඩිවියට එළැඹෙන තුරු ඉතා යහපත් අයුරින් මිස ළං නොවනු. තවද, ගිවිසුම ඉටු කරනු. නියතවශයෙන්ම ගිවිසුම පිළිබඳව ප්‍රශ්ණ කරනු ලබන්නේය.

وَاَوْفُوا الْكَيْلَ اِذَا كِلْتُمْ وَزِنُوْا بِالْقِسْطَاسِ الْمُسْتَقِيْمِ ؕ ذٰلِكَ خَيْرٌ وَّاَحْسَنُ تَاْوِيْلًا ﴿٣٦﴾

36. තවද, නුඹලා මනින විට මිනුම සම්පූර්ණ කරනු. තවද, නිවැරදි තරාදියකින් කිරනු. එය ඉතාමත් යහපත් මෙන්ම අවසානයේදී ප්‍රශංසනීය වේ.

وَلَا تَقْفُ مَا لَيْسَ لَكَ بِهٖ عِلْمٌ ؕ اِنَّ السَّمْعَ وَالْبَصَرَ وَالْفُؤَادَ كُلُّ اُولٰٓئِكَ كَانَ عَنْهُ مَسْـُٔوْلًا ﴿٣٧﴾

37. තවද, ඔබට දැනුමක් නැති දේ නොපිළිපදින්න. සැබැවින්ම කන්, ඇස් සහ හදවත යන මේ සියල්ලන්ගෙන් ප්‍රශ්ණ කරනු ලබන්නේය.

وَلَا تَمْشِ فِي الْاَرْضِ مَرَحًا ۚ اِنَّكَ لَنْ تَخْرِقَ الْاَرْضَ وَلَنْ تَبْلُغَ الْجِبَالَ طُوْلًا ﴿٣٨﴾

38. තවද, අහංකාරව පොළොවෙහි ගමන් නොකරන්න. ඇත්තෙන්ම ඔබට පොළොව ඉරාගෙන යා නොහැකිය. තවද, කඳු මුදුන් වලට ඔබට උස්විය නොහැකිය.

كُلُّ ذٰلِكَ كَانَ سَيِّئُهٗ عِنْدَ رَبِّكَ مَكْرُوْهًا ﴿٣٩﴾

39. ඒ සියල්ලෙහි නපුර ඔබ අධිපතියාණන් ඉදිරියෙහි පිළිකුල් සහගතය.

ذٰلِكَ مِمَّآ اَوْحٰٓى اِلَيْكَ رَبُّكَ مِنَ

40. මෙය ඔබගේ අධිපතියාණන් ඔබ වෙත අනාවරණය කර ඇති එම

الْحِكْمَةِ ۗ وَلَا تَجْعَلْ مَعَ اللَّهِ إِلَٰهًا آخَرَ فَتُلْقَىٰ فِي جَهَنَّمَ مَلُومًا مَدْحُورًا ﴿٤٠﴾

ප්‍රඥාවේ කොටසක් වේ. තවද අල්ලාහ් සමග වෙනත් දෙවියකුව (නැමදීමට) නොගන්න. එසේ කළහොත් ඔබ නින්දිතවද ප්‍රතික්ෂේපිතවද නිරයට ඇද දමනු ලබන්නෙහිය.

أَفَأَصْفَاكُمْ رَبُّكُمْ بِالْبَنِينَ وَاتَّخَذَ مِنَ الْمَلَائِكَةِ إِنَاثًا ۚ إِنَّكُمْ لَتَقُولُونَ قَوْلًا عَظِيمًا ﴿٤١﴾

41. එසේ නම් නුඹලාගේ අධිපතියාණන් නුඹලාව පුත්‍රයින් මගින් ගරුත්වයට පත්කොට සුරදූතයින් අතුරින් තමාට දූවරුන්ව ඇති කරගත්තේද? නියතවශයෙන්ම නුඹලා බරපතල කියමනක් කියන්නෙහුය.

وَلَقَدْ صَرَّفْنَا فِي هَٰذَا الْقُرْآنِ لِيَذَّكَّرُوا ۖ وَمَا يَزِيدُهُمْ إِلَّا نُفُورًا ﴿٤٢﴾

42. ඔවුන් අනුශාසනා ලබනු පිණිස අපි මෙම කුර්ආනයෙහි (වාක්‍යයන්) පුන පුනා පහදා දී ඇත්තෙමු. එහෙත් එය ඔවුනට වැඩිකරන්නේ පිළිකුල පමණි.

قُلْ لَوْ كَانَ مَعَهُ آلِهَةٌ كَمَا يَقُولُونَ إِذًا لَابْتَغَوْا إِلَىٰ ذِي الْعَرْشِ سَبِيلًا ﴿٤٣﴾

43. පවසන්න, 'ඔවුන් පවසන ආකාරයට ඔහු සමග තවත් දෙවිවරුන් සිටිත් නම් එවිට ඔවුන්ට (ප්‍රතිමා පුදන්නන්ට) සිහසුනේ හිමියා වෙත නියතවශයෙන්ම යෑමට මගක් සොයාගන්නට තිබුණි'.

سُبْحَانَهُ وَتَعَالَىٰ عَمَّا يَقُولُونَ عُلُوًّا كَبِيرًا ﴿٤٤﴾

44. ඔහු සුවිශුද්ධය, එමෙන්ම ඔවුන් පවසන දෙයට වඩා අති උතුම්ය.

تُسَبِّحُ لَهُ السَّمَاوَاتُ السَّبْعُ وَالْأَرْضُ وَمَنْ فِيهِنَّ ۚ وَإِنْ مِنْ شَيْءٍ إِلَّا يُسَبِّحُ بِحَمْدِهِ وَلَٰكِنْ لَا تَفْقَهُونَ تَسْبِيحَهُمْ ۗ إِنَّهُ كَانَ حَلِيمًا غَفُورًا ﴿٤٥﴾

45. අහස් සතද පොළොවද ඒවායෙහි ඇති දේවල්ද ඔහුගේ සුවිශුද්ධත්වය මහත්සේ ප්‍රශංසා කරති. තවද ඔහුගේ ප්‍රශංසාව සමග ඔහුව සුවිශුද්ධ නොකරන කිසිවක් නැත. එහෙත් ඔවුන්ගේ සුවිශුද්ධ කිරීම නුඹලා නොවටහා ගන්නෙහුය. සැබැවින්ම ඔහු ඉවසිලිවන්තය, අතිශයින්ම ක්ෂමාන්විතය.

وَإِذَا قَرَأْتَ الْقُرْآنَ جَعَلْنَا بَيْنَكَ وَبَيْنَ الَّذِينَ لَا يُؤْمِنُونَ بِالْآخِرَةِ حِجَابًا مَسْتُورًا ﴿٤٦﴾

46. තවද ඔබ කුර්ආනය පාරායනය කරන විට අපි, ඔබ සහ පරලොව කෙරෙහි විශ්වාස නොකරන අය අතර නොපෙනෙන තිරයක් දමා ඇත්තෙමු.

وَجَعَلْنَا عَلَىٰ قُلُوبِهِمْ أَكِنَّةً أَن يَفْقَهُوهُ وَفِي آذَانِهِمْ وَقْرًا ۚ وَإِذَا ذَكَرْتَ رَبَّكَ فِي الْقُرْآنِ وَحْدَهُ وَلَّوْا عَلَىٰ أَدْبَارِهِمْ نُفُورًا ﴿٤٧﴾

47. තවද, ඔවුන් එය වටහාගත නොහැකි ආකාරයට අපි ඔවුන්ගේ හදවත් මත තිරයන්ද, ඔවුන්ගේ කන් හි බිහිරිභාවයද ඇති කළෙමු. තවද ඔබ කුර්ආනයෙහි ඔබගේ එකම අධිපතියාණන් ගැන සිහිකරන විට ඔවුහු පිළිකුලෙන් ඔවුන්ගේ පිට හරවා යති.

نَحْنُ أَعْلَمُ بِمَا يَسْتَمِعُونَ بِهِ إِذْ يَسْتَمِعُونَ إِلَيْكَ وَإِذْ هُمْ نَجْوَىٰ إِذْ يَقُولُ الظَّالِمُونَ إِن تَتَّبِعُونَ إِلَّا رَجُلًا مَّسْحُورًا ﴿٤٨﴾

48. ඔවුන් ඔබට සවන් දෙන විට ඔවුන් සවන් දෙන්නේ කුමකටද යන්නත් ඔවුන් රහසිගතව සාකච්ඡාවන්හි යෙදෙන කල්හි වරදකරුවන්, 'නුඹලා අනුගමනය කරන්නේ මුලාවීමට ලක්වූ මිනිසෙකු විනා අන්කිසිවකු නොවේ'යැයි පවසන විටත් අපි එය වඩාත් හොඳින් දනිමු.

انظُرْ كَيْفَ ضَرَبُوا لَكَ الْأَمْثَالَ فَضَلُّوا فَلَا يَسْتَطِيعُونَ سَبِيلًا ﴿٤٩﴾

49. ඔවුන් ඔබ ගැන උපමා ගොතන්නේ කෙසේදැයි බලන්න. තවද මේනිසා ඔවුන් නොමග ගොස් ඇත. එබැවින් ඔවුන්ට (නිවැරදි) මාර්ගයක් සොයා ගැනීමට නොහැක.

وَقَالُوا أَإِذَا كُنَّا عِظَامًا وَرُفَاتًا أَإِنَّا لَمَبْعُوثُونَ خَلْقًا جَدِيدًا ﴿٥٠﴾

50. තවද ඔවුහු, 'අපි ඇටකටු සහ කැඩුනු කැබලි වලට පත්වූ විට ඇත්තෙන්ම අප නව මැවීමක් ලෙස නැගිටවනු ලබන්නේදැ'යි පවසති.

قُلْ كُونُوا حِجَارَةً أَوْ حَدِيدًا ﴿٥١﴾

51. පවසන්න, 'නුඹලා ගල් හෝ යකඩ වනු'.

أَوْ خَلْقًا مِّمَّا يَكْبُرُ فِي صُدُورِكُمْ ۚ فَسَيَقُولُونَ مَن يُعِيدُنَا ۖ قُلِ الَّذِي فَطَرَكُمْ أَوَّلَ مَرَّةٍ ۚ فَسَيُنْغِضُونَ إِلَيْكَ رُءُوسَهُمْ وَيَقُولُونَ مَتَىٰ هُوَ ۖ قُلْ عَسَىٰ أَن يَكُونَ قَرِيبًا ﴿٥٢﴾

52. 'නැත්නම් නුඹලාගේ සිත්හි ඉතාමත් දැඩි යැයි දැනෙන (ඕනෑම වර්ගයකින්) මැවූ දෙයක්ද (වනු). (එසේ වුවද නුඹලා නැගිටුවනු ලබන්නෙහුමය)'. එවිට ඔවුහු 'අපව නැවතත් ජීවයට පත්කරන්නේ කවුරුන්දැ?'යි අසන්නෝය. 'නුඹලාව පළමුවර මැවූ ඔහුමයැ'යි පවසන්න. එවිට ඔවුහු ඔබ වෙත හිස් සොලවමින් 'එය සිදුවන්නේ කවදා දැ?'යි අසන්නෝය. 'එය ළඟදීම වනු ඇතැ'යි පවසන්න.

يَوْمَ يَدْعُوكُمْ فَتَسْتَجِيبُونَ بِحَمْدِهِ وَتَظُنُّونَ إِن لَّبِثْتُمْ إِلَّا قَلِيلًا ﴿٥٣﴾ ع

53. 'ඔහු නුඹලාව කැඳවන විට එම දිනයේදී (එය සිදුවන්නේය). එවිට නුඹලා ඔහුට ප්‍රශංසා කරමින් ප්‍රතිචාර දක්වන්නෙහුය. තවද නුඹලා ගතකර ඇත්තේ සුළු කාලයක් මිස නැතැයි නුඹලා සිතන්නෙහුය'.

وَقُل لِّعِبَادِي يَقُولُوا الَّتِي هِيَ أَحْسَنُ ۚ إِنَّ الشَّيْطَانَ يَنزَغُ بَيْنَهُمْ ۚ إِنَّ الشَّيْطَانَ كَانَ لِلْإِنسَانِ عَدُوًّا مُّبِينًا ﴿٥٤﴾

54. තවද මාගේ දාසයින්ට ඔවුන් ඉතා යහපත් දේ කථාකළ යුතු බව පවසන්න. නියතවශයෙන්ම ෂෙයිතාන් ඔවුන් අතර භේදභින්න වීමට පොළඹවයි. නියතවශයෙන්ම ෂෙයිතාන් මිනිසාට ප්‍රකට සතුරෙකි.

رَّبُّكُمْ أَعْلَمُ بِكُمْ ۚ إِن يَشَأْ يَرْحَمْكُمْ أَوْ إِن يَشَأْ يُعَذِّبْكُمْ ۚ وَمَا أَرْسَلْنَاكَ عَلَيْهِمْ وَكِيلًا ﴿٥٥﴾

55. නුඹලාගේ අධිපතියාණන් නුඹලාව වඩා හොඳින් දනියි. ඔහු කැමති වන්නේ නම් ඔහු නුඹලා වෙත දයාව දක්වන්නේය. නැතහොත් ඔහු කැමති වන්නේ නම් ඔහු නුඹලාට දඬුවම් දෙන්නේය. තවද ඔවුන්ගේ රැකවලා ලෙස අපි ඔබව නොඑව්වෙමු.

وَرَبُّكَ أَعْلَمُ بِمَن فِي السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ وَلَقَدْ فَضَّلْنَا بَعْضَ النَّبِيِّينَ عَلَىٰ بَعْضٍ وَآتَيْنَا دَاوُودَ زَبُورًا ﴿٥٦﴾

56. තවද අහස්හි මෙන්ම පොළොවෙහි ඇති සියල්ලන් ගැන ඔබගේ අධිපතියාණන් වඩාත් හොඳින් දනියි. තවද නියතවශයෙන්ම අපි චක්තෘවරුන්ගෙන් සමහරුන්ව සෙසු අයට වඩා උසස් කළෙමු. තවද අපි දාවුද් හට zසබූර් දුන්නෙමු.

قُلِ ادْعُوا الَّذِينَ زَعَمْتُم مِّن دُونِهِ فَلَا يَمْلِكُونَ كَشْفَ الضُّرِّ عَنكُمْ وَلَا تَحْوِيلًا ﴿٥٧﴾

57. 'ඔහු හැරෙන්නට (වෙනත් දෙවිවරුන් වේ යැයි) නුඹලා සිතන අයව කැඳවනු. එවිට නුඹලාව විපතකින් මුදවාගැනීමට හෝ එය වෙනස් කිරීමට හෝ ඔවුන්ට බලයක් නැති බව (නුඹලා දැනගන්නෙහුයැ)' යි පවසන්න.

أُولَٰئِكَ الَّذِينَ يَدْعُونَ يَبْتَغُونَ إِلَىٰ رَبِّهِمُ الْوَسِيلَةَ أَيُّهُمْ أَقْرَبُ وَيَرْجُونَ رَحْمَتَهُ وَيَخَافُونَ عَذَابَهُ ۚ إِنَّ عَذَابَ

58. මොවුන් කවුරුන්ව කැඳවන්නේද, ඔවුන්ද තමන්ගේ අධිපතියාණන් වෙත සමීපවීමට මාර්ගයක් පතන්නෝය. එය (අධිපතියාණන්) වෙත ඉතා සමීපවන්නා කව්රුන්ද යන්නය. තවද ඔවුන් ඔහුගේ දයාව අපේක්ෂා කරන්නෝය. තවද ඔවුන් ඔහුගේ දඬුවමට බිය වන්නෝය.

رَبِّكَ كَانَ مَحْذُورًا ﴿٥٨﴾

නියතවශයෙන්ම ඔබ අධිපතියාණන්ගේ දඬුවම, බිය විය යුතු දෙයක් වේ.

وَإِن مِّن قَرْيَةٍ إِلَّا نَحْنُ مُهْلِكُوهَا قَبْلَ يَوْمِ الْقِيٰمَةِ أَوْ مُعَذِّبُوهَا عَذَابًا شَدِيدًا ۚ كَانَ ذٰلِكَ فِي الْكِتٰبِ مَسْطُورًا ﴿٥٩﴾

59. පුනරුත්ථාන දිනයට පෙර අප විනාශයට පත් කරන හෝ බරපතල දඬුවමකින් එයට දඬුවම් පමුණුවන හෝ කිසිම නගරයක් මිස නැත. මෙය ග්‍රන්ථයෙහි ලියන ලද්දකි.

وَمَا مَنَعَنَا أَن نُّرْسِلَ بِالْاٰيٰتِ إِلَّا أَن كَذَّبَ بِهَا الْأَوَّلُونَ ۚ وَاٰتَيْنَا ثَمُودَ النَّاقَةَ مُبْصِرَةً فَظَلَمُوا بِهَا ۚ وَمَا نُرْسِلُ بِالْاٰيٰتِ إِلَّا تَخْوِيفًا ﴿٦٠﴾

60. තවද අප සළකුණු එවීමෙන් පෙර ජනතාව ඒවා ප්‍රතික්ෂේප කළා මිස කිසිම දෙයක් අපට බාධා කළේ නැත. (එහෙත් මෙය බාධාවක් නොවේ). තවද පැහැදිලි සළකුණක් ලෙස අපි සමූද්ට ඔටුදෙනක් දුනිමු. එහෙත් ඔවුහු එයට වදහිංසා කළහ. තවද අවවාද කිරීමට විනා අපි සළකුණු නොඑවන්නෙමු.

وَإِذْ قُلْنَا لَكَ إِنَّ رَبَّكَ أَحَاطَ بِالنَّاسِ ۚ وَمَا جَعَلْنَا الرُّءْيَا الَّتِي أَرَيْنٰكَ إِلَّا فِتْنَةً لِّلنَّاسِ وَالشَّجَرَةَ الْمَلْعُونَةَ فِي الْقُرْاٰنِ ۚ وَنُخَوِّفُهُمْ ۙ فَمَا يَزِيدُهُمْ إِلَّا طُغْيٰنًا كَبِيرًا ﴿٦١﴾ ع

61. තවද අපි ඔබ වෙත 'නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් මිනිසුන්ව වටලා ඇත්තේයැ'යි පැවසූ විට (එම අවස්ථාව සිහිපත් කරන්න). තවද අප ඔබට පෙන්වා දුන් දර්ශනයද එලෙසම කුර්ආනයෙහි ශාප කරන ලද ගසද මිනිසුන්ට පිරික්සුමක් මිස අපි නොකළෙමු. තවද අපි ඔවුන්ට අවවාද කරන්නෙමු. එහෙත් එය ඔවුන්ව මහත්වූ සීමාව ඉක්මවීමෙහි පමණක් වැඩි කරයි.

وَإِذْ قُلْنَا لِلْمَلٰٓئِكَةِ اسْجُدُوا لِاٰدَمَ فَسَجَدُوٓا إِلَّآ إِبْلِيسَ ۚ قَالَ ءَأَسْجُدُ لِمَنْ خَلَقْتَ طِينًا ﴿٦٢﴾

62. තවද අපි සුරදූතයින් වෙත 'ආදම්ට අවනත වනු'යි පැවසූ විට ඔවුන් (සියලුදෙනාම) අවනත වූහ. ඉබ්ලීස් හැර. ඔහු 'ඔබ මැටියෙන් මැවූ තැනැත්තෙකුට මම අවනත විය යුතුදැ?'යි ඇසීය.

قَالَ أَرَءَيْتَكَ هٰذَا الَّذِي كَرَّمْتَ عَلَيَّ ۖ لَئِنْ أَخَّرْتَنِ إِلٰى يَوْمِ الْقِيٰمَةِ لَأَحْتَنِكَنَّ

63. (තවද) 'ඔබ මට කියන්න. ඔබ මට වඩා ඉහලින් ගරුත්වයට පත්කර ඇත්තේ මොහුවද? පුනරුත්ථාන දිනය තෙක් ඔබ මට කල් දෙන්නේ

ذُرِّيَّتَهٗۤ اِلَّا قَلِيۡلًا ﴿٦٣﴾

නම්, නියතවශයෙන් ස්වල්පදෙනෙකු හැරෙන්නට මොහුගෙන් පැවත එන්නන්ව මම වසඟ කරගන්නෙමි'යි ඔහු කීවේය.

قَالَ اذۡهَبۡ فَمَنۡ تَبِعَكَ مِنۡهُمۡ فَاِنَّ جَهَنَّمَ جَزَآؤُكُمۡ جَزَآءً مَّوۡفُوۡرًا ﴿٦٤﴾

64. (මෙයට) ඔහු, 'යනු! තවද මොවුන්ගෙන් යමෙක් නුඹව අනුගමනය කරන්නේද, නියතවශයෙන්ම නිරය නුඹලා සියල්ලන්ට ප්‍රතිවිපාකය වන්නේය. (එය) පූර්ණ ප්‍රතිවිපාකයකි'යි කීවේය.

وَاسۡتَفۡزِزۡ مَنِ اسۡتَطَعۡتَ مِنۡهُمۡ بِصَوۡتِكَ وَاَجۡلِبۡ عَلَيۡهِمۡ بِخَيۡلِكَ وَرَجِلِكَ وَشَارِكۡهُمۡ فِى الۡاَمۡوَالِ وَالۡاَوۡلَادِ وَعِدۡهُمۡ‌ؕ وَمَا يَعِدُهُمُ الشَّيۡطٰنُ اِلَّا غُرُوۡرًا ﴿٦٥﴾

65. 'තවද ඔවුන් අතරින් නුඹට හැකි සෑම අයෙකුව නුඹගේ හඬින් වශී කරගනු. තවද ඔවුන්ට එරෙහිව නුඹගේ අශ්වාරෝහකයින්වද නුඹගේ පාබල සේනාවද පොළඹවාගනු. තවද (ඔවුන්ගේ) ධනය සහ දරුවන්හි ඔවුන්ගේ කොටස්කරුවෙකු වනු. එමෙන්ම ඔවුන්ට පොරොන්දු දෙනු'. තවද මුළා කිරීම හැර ෂෙයිතාන් අන් කිසිවක් ඔවුන්ට පොරොන්දු නොකරයි.

اِنَّ عِبَادِىۡ لَـيۡسَ لَكَ عَلَيۡهِمۡ سُلۡطٰنٌ‌ ؕ وَكَفٰى بِرَبِّكَ وَكِيۡلًا ﴿٦٦﴾

66. නියතවශයෙන්ම මාගේ දාසයින් (ගත්කළ) ඔවුන් කෙරෙහි කිසිදු බලයක් නුඹට නැත. තවද ආරක්ෂකයෙකු ලෙස ඔබගේ අධිපතියාණන් ප්‍රමාණවත්ය.

رَبُّكُمُ الَّذِىۡ يُزۡجِىۡ لَـكُمُ الۡـفُلۡكَ فِى الۡبَحۡرِ لِتَبۡتَغُوۡا مِنۡ فَضۡلِهٖ‌ ؕ اِنَّهٗ كَانَ بِكُمۡ رَحِيۡمًا ﴿٦٧﴾

67. නුඹලා ඔහුගේ වරප්‍රසාදයන් සොයාගනු පිණිස මුහුදෙහි නුඹලාට නැව් මෙහෙයවන්නේ නුඹලාගේ අධිපතියාණන්ය. නියතවශයෙන්ම ඔහු නුඹලා කෙරෙහි පරම දයාබරය.

وَاِذَا مَسَّكُمُ الضُّرُّ فِى الۡبَحۡرِ ضَلَّ مَنۡ تَدۡعُوۡنَ اِلَّاۤ اِيَّاهُ‌ ۚ فَلَمَّا نَجّٰٮكُمۡ اِلَى الۡبَرِّ اَعۡرَضۡتُمۡ‌ ؕ وَكَانَ الۡاِنۡسَانُ كَفُوۡرًا ﴿٦٨﴾

68. තවද මුහුදේදී (නුඹලාට) යම් විපතක් සිදු වූ විට ඔහු හැරෙන්නට නුඹලා කැඳවන සියල්ලන්ම නුඹලාට අහිමි වේ. පසුව ඔහු නුඹලාව ආරක්ෂිතව ගොඩබිම වෙත ගෙන ආ විට නුඹලා පිටුපාන්නෙහුය. තවද මිනිසා ඉතා අකෘතඥය.

اَفَاَمِنۡتُمۡ اَنۡ يَّخۡسِفَ بِكُمۡ جَانِبَ الۡبَرِّ اَوۡ

69. ගොඩබිමේ අයිනකින් ඔහු නුඹලාව ගිල්වා දැමීමෙන් හෝ නුඹලා

يُرْسِلَ عَلَيْكُمْ حَاصِبًا ثُمَّ لَا تَجِدُوا لَكُمْ وَكِيلًا ﴿٦٩﴾

මත දරුණු වැලි කුණාටුවක් එවීමෙන් හෝ නුඹලා සුරක්ෂිතදැයි (නුඹලාට) හැඟෙන්නේද? පසුව නුඹලා වෙනුවෙන් කිසිදු ආරක්ෂකයෙකු නුඹලා නොලබන්නෙහුය.

أَمْ أَمِنتُمْ أَن يُعِيدَكُمْ فِيهِ تَارَةً أُخْرَىٰ فَيُرْسِلَ عَلَيْكُمْ قَاصِفًا مِّنَ الرِّيحِ فَيُغْرِقَكُم بِمَا كَفَرْتُمْ ۙ ثُمَّ لَا تَجِدُوا لَكُمْ عَلَيْنَا بِهِ تَبِيعًا ﴿٧٠﴾

70. නැතහොත් නැවත වරක් නුඹලාව ආපසු එහි(මුහුදෙහි) යවා පසුව නුඹලා කෙරෙහි සුළිකුණාටුවක්ද එවා නුඹලාගේ අවිශ්වාසකම නිසා ඔහු නුඹලාව ගිල්වා දැමීමෙන් නුඹලා සුරක්ෂිතදැයි (නුඹලාට) හැඟෙන්නේද? එවිට අපට එරෙහිව නුඹලාට උදව්වන කිසිවෙකුව නුඹලා නොලබන්නෙහුය.

وَلَقَدْ كَرَّمْنَا بَنِي آدَمَ وَحَمَلْنَاهُمْ فِي الْبَرِّ وَالْبَحْرِ وَرَزَقْنَاهُم مِّنَ الطَّيِّبَاتِ وَفَضَّلْنَاهُمْ عَلَىٰ كَثِيرٍ مِّمَّنْ خَلَقْنَا تَفْضِيلًا ﴿٧١﴾ ع

71. ඇත්තෙන්ම අපි ආදම්ගේ දරුවන්ට ගෞරවය දක්වා ඇත්තෙමු. තවද ගොඩබිමෙහි සහ මුහුදෙහි ඔවුන්ව ප්‍රවාහනය කරවීමු. තවද ඔවුන්ට යහපත් දේ ලබා දුනිමු. තවද අප මවා ඇති බොහොමයන්ට වඩා ඉහලින් ඔවුන්ව විශිෂ්ඩ කර ඇත්තෙමු.

يَوْمَ نَدْعُوا كُلَّ أُنَاسٍ بِإِمَامِهِمْ ۖ فَمَنْ أُوتِيَ كِتَابَهُ بِيَمِينِهِ فَأُولَٰئِكَ يَقْرَءُونَ كِتَابَهُمْ وَلَا يُظْلَمُونَ فَتِيلًا ﴿٧٢﴾

72. සෑම ජනසමූහයක්ම සිය නායකයා සමගින් අප කැඳවන දිනය (සිහිපත් කරන්න). පසුව යමෙකුට තම දකුණතෙහි තම වාර්තා පොත දෙනු ලබන්නේද එවන් අය තමන්ගේ වාර්තා පොත කියවන්නෝය. ඔවුන්ට අංශුවක් තරම් හෝ වරදක් නොකරනු ලබන්නේය.

وَمَن كَانَ فِي هَٰذِهِ أَعْمَىٰ فَهُوَ فِي الْآخِرَةِ أَعْمَىٰ وَأَضَلُّ سَبِيلًا ﴿٧٣﴾

73. එහෙත් කවරෙක් මෙලොවදී අන්ධ වේද පරලොවදීද අන්ධ වන්නේය. තවද (ඍජු)මාර්ගයෙන් බොහෝ දුර නොමග ගොස්ය.

وَإِن كَادُوا لَيَفْتِنُونَكَ عَنِ الَّذِي أَوْحَيْنَا إِلَيْكَ لِتَفْتَرِيَ عَلَيْنَا غَيْرَهُ ۖ وَإِذًا لَّاتَّخَذُوكَ خَلِيلًا ﴿٧٤﴾

74. තවද අප ඔබට අනාවරණය කර ඇති දෙයින් ඔබ ඒ වෙනුවට තවත් දෙයක් අපට එරෙහිව ගෙතීම හේතුකොටගෙන ඔබව ඔවුන් (බරපතල) පිරික්සුමෙහි හසු කරන්නට ඉඩ තිබුණි. එසේ වුවහොත් නියතවශයෙන්ම ඔවුන් ඔබව (විශේෂ) මිතුරෙකු බවට පත්කරගන්නට ඉඩ තිබුණි.

وَلَوْلَآ اَنْ ثَبَّتْنٰكَ لَقَدْ كِدْتَّ تَرْكَنُ اِلَيْهِمْ شَيْـًٔا قَلِيْلًا ﴿٧٥﴾

75. තවද අප (කුර්ආනය සමග) ඔබව ශක්තිමත් නොකළේ නම් ඔබ ඔවුන් වෙත තරමක් හෝ නැඹුරු වන්නට ඉඩ තිබුණි.

اِذًا لَّاَذَقْنٰكَ ضِعْفَ الْحَيٰوةِ وَضِعْفَ الْمَمَاتِ ثُمَّ لَا تَجِدُ لَكَ عَلَيْنَا نَصِيْرًا ﴿٧٦﴾

76. එසේ වුයේ නම්, අප ඔබට ජිවිතයෙහි (දඬුවම) දෙගුණයක්ද, මරණයෙහි (දඬුවම) දෙගුණයක්ද, විඳීමට ඉඩ සලස්වන්නට තිබුණි. එවිට අපට එරෙහිව ඔබට උදව්කරුවෙකු ඔබ නොදකින්නෙහිය.

وَاِنْ كَادُوْا لَيَسْتَفِزُّوْنَكَ مِنَ الْاَرْضِ لِيُخْرِجُوْكَ مِنْهَا وَاِذًا لَّا يَلْبَثُوْنَ خِلٰفَكَ اِلَّا قَلِيْلًا ﴿٧٧﴾

77. තවද ඇත්තෙන්ම ඔවුන් ඔබව භූමියෙන් (ඔබගේ පදිංචිය) අවුල් කර ඔවුන් ඔබව එයින් පලවා හැරීමට ඉතා නුදුරුය. එය එසේ වුවහොත් ඔබෙන් පසුව ඔවුන්ද සුළු කාලයක් මිස පදිංචි නොවන්නෝය.

سُنَّةَ مَنْ قَدْ اَرْسَلْنَا قَبْلَكَ مِنْ رُّسُلِنَا وَلَا تَجِدُ لِسُنَّتِنَا تَحْوِيْلًا ﴿٧٨﴾

78. ඔබට පෙර අප එවු අපගේ දූතයින් සමග (අපගේ) පිළිවෙත වූයේ මෙයයි. තවද අපගේ පිළිවෙතහි කිසිදු වෙනසක් ඔබ නොදකිනු ඇත.

اَقِمِ الصَّلٰوةَ لِدُلُوْكِ الشَّمْسِ اِلٰى غَسَقِ الَّيْلِ وَقُرْاٰنَ الْفَجْرِ ؕ اِنَّ قُرْاٰنَ الْفَجْرِ كَانَ مَشْهُوْدًا ﴿٧٩﴾

79. හිරු ඇලවීමේ සිට දිජ්තිය අඩුව් රාත්‍රියෙහි අන්ධකාරය පැතිරීම දක්වා නමස්කාරය ඉටුකරන්න. තවද හිමිදිරියේ (නමස්කාරයෙහි කුර්ආනය) පාරායනය කිරීමද (ඉටුකරන්න). සැබැවින්ම හිමිදිරියේ (කුර්ආනය) පාරායනය කිරීම (අල්ලාහ් විසින් විශේෂයෙන්ම) පිළිගනු ලබන්නේය.

وَمِنَ الَّيْلِ فَتَهَجَّدْ بِهٖ نَافِلَةً لَّكَ ۖ عَسٰٓى اَنْ يَّبْعَثَكَ رَبُّكَ مَقَامًا مَّحْمُوْدًا ﴿٨٠﴾

80. තවද රාත්‍රියේ (අගභාගයේ)දී එය(කුර්ආනය) සමග තහජ්ජුද් නැමදීමට අවදිවන්න. මෙය ඔබට අමතර ලැබීමක් වනු ඇත. එහෙයින් ඔබගේ අධිපතියාණන් ඔබව අති උතුම් වූ ස්ථානයකට උසස් කරනු ඇත.

وَقُلْ رَّبِّ اَدْخِلْنِيْ مُدْخَلَ صِدْقٍ وَّاَخْرِجْنِيْ مُخْرَجَ صِدْقٍ وَّاجْعَلْ

81. තවද 'මාගේ අධිපතියාණනි! මාගේ ප්‍රවේශවීම යහපත් ප්‍රවේශ වීමක් කරනු මැනව. තවද මාගේ

لِّيْ مِنْ لَّدُنْكَ سُلْطٰنًا نَّصِيْرًا ﴿٨١﴾

පිටත්වීම යහපත් පිටත්වීමක් කරනු මැනව. තවද ඔබ වෙතින් මාහට බලවත් උදව්කරුවෙක් ලබාදෙන්නැ'යි පවසන්න.

وَقُلْ جَآءَ الْحَقُّ وَزَهَقَ الْبَاطِلُ ۚ اِنَّ الْبَاطِلَ كَانَ زَهُوْقًا ﴿٨٢﴾

82. තවද 'සත්‍යය පැමිණ ඇත. තවද අසත්‍ය තුරන් වී ඇත. ඇත්තෙන්ම අසත්‍ය (ඉක්මණින්ම) තුරන්වන්නේමයැ'යි පවසන්න.

وَنُنَزِّلُ مِنَ الْقُرْاٰنِ مَا هُوَ شِفَآءٌ وَّرَحْمَةٌ لِّلْمُؤْمِنِيْنَ ۙ وَلَا يَزِيْدُ الظّٰلِمِيْنَ اِلَّا خَسَارًا ﴿٨٣﴾

83. තවද විශ්වාසිතයින්ට නිවාරණයක් මෙන්ම දයාවක් වන කුර්ආනය අපි (ක්‍රමානුකූලව) පහළ කරමින් සිටිමු. නමුත් එය වරදකරුවන්ට පාඩුව මිස අන්දෙයක් වැඩි නොකරන්නේය.

وَاِذَآ اَنْعَمْنَا عَلَى الْاِنْسَانِ اَعْرَضَ وَنَاٰ بِجَانِبِهٖ ۚ وَاِذَا مَسَّهُ الشَّرُّ كَانَ يَـُٔوْسًا ﴿٨٤﴾

84. තවද අප මිනිසා කෙරෙහි අනුග්‍රහය පිරිනමන විට ඔහු පැත්තකට හැරෙමින් ඉවත යන්නේය. තවද ඔහුට නපුරක් අත් වූ කල්හි, ඔහු බලාපොරොත්තු සුන් කරගන්නේය.

قُلْ كُلٌّ يَّعْمَلُ عَلٰى شَاكِلَتِهٖ ۗ فَرَبُّكُمْ اَعْلَمُ بِمَنْ هُوَ اَهْدٰى سَبِيْلًا ﴿٨٥﴾ ع

85. පවසන්න 'සෑම අයෙක්ම තම තමන්ගේ පිළිවෙතට අනුව කටයුතු කරන්නේය. එහෙත් වඩාත් හොඳින් මග පෙන්වනු ලැබුවෝ කවුරුන්දැයි ඔබගේ අධිපතියාණන් ඉතා මැනැවින් දනියි'.

وَيَسْـَٔلُوْنَكَ عَنِ الرُّوْحِ ۗ قُلِ الرُّوْحُ مِنْ اَمْرِ رَبِّيْ وَمَآ اُوْتِيْتُمْ مِّنَ الْعِلْمِ اِلَّا قَلِيْلًا ﴿٨٦﴾

86. තවද ඔවුහු ආත්මය ගැන ඔබගෙන් විමසති. 'ආත්මය මාගේ අධිපතියාණන්ගේ විධානය අනුව වේ. තවද (ඒ පිළිබඳව) දැනුම නුඹලාට දෙන ලද්දේ සුළුවෙන් මිස නැතැ'යි පවසන්න.

وَلَئِنْ شِئْنَا لَنَذْهَبَنَّ بِالَّذِيْٓ اَوْحَيْنَآ اِلَيْكَ ثُمَّ لَا تَجِدُ لَكَ بِهٖ عَلَيْنَا وَكِيْلًا ﴿٨٧﴾

87. තවද අප කැමැත්තේ නම් අප ඔබට අනාවරණය කර ඇති දේ නියතවශයෙන්ම අප පැහැර ගන්නට තිබුණි. එසේ වුවහොත් මෙ(ම කාරණයෙ)හි අපට එරෙහිව ඔබට කිසිදු ආරක්ෂකයෙකු ඔබ නොදකින්නෙහිය.

إِلَّا رَحْمَةً مِّن رَّبِّكَ ۚ إِنَّ فَضْلَهُ كَانَ عَلَيْكَ كَبِيرًا ﴿٨٨﴾

88. ඔබ අධිපතියාණන්ගේ දයාව හැරෙන්නටය. නියතවශයෙන්ම ඔබ කෙරෙහි ඔහුගේ වරප්‍රසාදය අති මහත්ය.

قُل لَّئِنِ اجْتَمَعَتِ الْإِنسُ وَالْجِنُّ عَلَىٰ أَن يَأْتُوا بِمِثْلِ هَٰذَا الْقُرْآنِ لَا يَأْتُونَ بِمِثْلِهِ وَلَوْ كَانَ بَعْضُهُمْ لِبَعْضٍ ظَهِيرًا ﴿٨٩﴾

89. 'මෙම කුර්ආනය වැනි එකක් ගෙන ඒමට මිනිස් වර්ගයා සහ ජින්වරුන් එකට එක්රැස් වුවත්, ඔවුනට එවැන්නක් ගෙන ඒමට නොහැකි වන්නේමය. ඒ සඳහා ඔවුන් එකිනෙකාට උදව් කළා වුවදැ'යි පවසන්න.

وَلَقَدْ صَرَّفْنَا لِلنَّاسِ فِي هَٰذَا الْقُرْآنِ مِن كُلِّ مَثَلٍ فَأَبَىٰ أَكْثَرُ النَّاسِ إِلَّا كُفُورًا ﴿٩٠﴾

90. තවද මෙම කුර්ආනයෙහි සෑම වර්ගයේම උපමා මිනිස් වර්ගයා වෙනුවෙන් නොයෙක් ආකාරයෙන් නියතවශයෙන්ම අපි ගෙනහැර දැක්වීමු. එහෙත් බොහෝ මිනිසුන් අවිශ්වාසිතකම හැර අන් සෑම දෙයක්ම ප්‍රතික්ෂේප කළෝය.

وَقَالُوا لَن نُّؤْمِنَ لَكَ حَتَّىٰ تَفْجُرَ لَنَا مِنَ الْأَرْضِ يَنبُوعًا ﴿٩١﴾

91. තවද ඔවුහු 'ඔබ අප වෙනුවෙන් පොළොවෙන් පැන නගින දිය උල්පතක් ඇති නොකරන තෙක් අපි ඔබ කෙරෙහි කිසිවිටෙකත් විශ්වාස නොකරන්නෙමු'යි කියති.

أَوْ تَكُونَ لَكَ جَنَّةٌ مِّن نَّخِيلٍ وَعِنَبٍ فَتُفَجِّرَ الْأَنْهَارَ خِلَالَهَا تَفْجِيرًا ﴿٩٢﴾

92. 'එසේ නැතහොත් ඔබට රට ඉඳි ගස් හා මිදි සහිත උයනක් ඇතිව ඒ මැදින් බහුලව දිය දහරාවන් වේගයෙන් ගලා යෑමට ඔබ සැලැස්විය යුතුය'.

أَوْ تُسْقِطَ السَّمَاءَ كَمَا زَعَمْتَ عَلَيْنَا كِسَفًا أَوْ تَأْتِيَ بِاللَّهِ وَالْمَلَائِكَةِ قَبِيلًا ﴿٩٣﴾

93. 'නැතහොත් ඔබ අපට වාද කළ පරිදි අහස් කැබලි වී අප මත වැටෙන්නට ඔබ සැලැස්විය යුතුය. නැතහොත් ඔබ අප ඉදිරියේ මුහුණට මුහුණලා සිටීමට අල්ලාහ්වද සුරදූතයින්වද ගෙන ආ යුතුය'.

أَوْ يَكُونَ لَكَ بَيْتٌ مِّن زُخْرُفٍ أَوْ تَرْقَىٰ فِي السَّمَاءِ ۚ وَلَن نُّؤْمِنَ لِرُقِيِّكَ

94. 'එසේ නැතහොත් ඔබට රන් ගෙයක් තිබිය යුතුය. නැතහොත් ඔබ අහසට නැගී යා යුතුය. තවද (එහි සිට) අපට කියවිය හැකි පුස්තකයක්

حَتّٰى تُنَزِّلَ عَلَيْنَا كِتٰبًا نَّقْرَؤُهٗ ؕ قُلْ سُبْحَانَ رَبِّىْ هَلْ كُنْتُ اِلَّا بَشَرًا رَّسُوْلًا ﴿٩٤﴾

ඔබ අප වෙත පහළ නොකරන තුරු අපි ඔබගේ (අහසට) නැගී යෑම විශ්වාස නොකරන්නෙමු'. පවසන්න 'මාගේ අධිපතියාණන් සුවිශුද්ධය. මම මනුෂ්‍යයෙකු වන දූතයෙකු මිස නොවෙමි'.

وَمَا مَنَعَ النَّاسَ اَنْ يُّؤْمِنُوْۤا اِذْ جَآءَهُمُ الْهُدٰۤى اِلَّاۤ اَنْ قَالُوْۤا اَبَعَثَ اللّٰهُ بَشَرًا رَّسُوْلًا ﴿٩٥﴾

95. තවද මිනිසුන්ව විශ්වාස කිරීමෙන් වැළැක්වූයේ, ඔවුන් වෙත මග පෙන්වීම පැමිණි කල්හි, ඔවුන් 'අල්ලාහ් දූතයෙකු (වශයෙන්) යවා ඇත්තේ මිනිසෙකුවදැ?'යි පැවසීම හැරෙන්නට අන්කිසිවක් නැත.

قُلْ لَّوْ كَانَ فِى الْاَرْضِ مَلٰۤٮِٕكَةٌ يَّمْشُوْنَ مُطْمَٮِٕنِّيْنَ لَنَزَّلْنَا عَلَيْهِمْ مِّنَ السَّمَآءِ مَلَكًا رَّسُوْلًا ﴿٩٦﴾

96. 'සැනසිල්ලෙන් සැරිසරන සුරදූතයින් පොළොවෙහි සිටියේ නම්, නියතවශයෙන්ම අප ඔවුන් වෙත අහසින් සුරදූතයෙකුව, දූතයෙකු ලෙස පහළ කරන්නට තිබුණි'යි පවසන්න.

قُلْ كَفٰى بِاللّٰهِ شَهِيْدًاۢ بَيْنِىْ وَبَيْنَكُمْ ؕ اِنَّهٗ كَانَ بِعِبَادِهٖ خَبِيْرًاۢ بَصِيْرًا ﴿٩٧﴾

97. 'මා සහ නුඹලා අතර සාක්ෂිකරුවෙකු වශයෙන් අල්ලාහ් ප්‍රමාණවත් වේ. නියතවශයෙන්ම සිය දාසයින්ව ඔහු මැනැවින් දන්නේය, දකින්නේයැ'යි පවසන්න.

وَمَنْ يَّهْدِ اللّٰهُ فَهُوَ الْمُهْتَدِ ۚ وَمَنْ يُّضْلِلْ فَلَنْ تَجِدَ لَهُمْ اَوْلِيَآءَ مِنْ دُوْنِهٖ ؕ وَنَحْشُرُهُمْ يَوْمَ الْقِيٰمَةِ عَلٰى وُجُوْهِهِمْ عُمْيًا وَّبُكْمًا وَّصُمًّا ؕ مَاْوٰٮهُمْ جَهَنَّمُ ؕ كُلَّمَا خَبَتْ زِدْنٰهُمْ سَعِيْرًا ﴿٩٨﴾

98. තවද අල්ලාහ් කවරෙකුට යහමග පෙන්වන්නේද ඔහු(ම) යහමග ලද්දාය. තවද ඔහු කවරෙකුව නොමග හැර දමන්නේද ඔවුන් සඳහා ඔහු හැර උදව්කරුවන් කිසිවෙකුව ඔබ නොදකින්නෙහිමය. තවද පුනරුත්ථාන දිනයේදී අන්ධයින්, ගොළුවන් සහ බිහිරන් ලෙසින් ඔවුන් මුහුණින් අතට හැරුණු ආකාරයෙන් අපි ඔවුන්ව එක්රැස් කරන්නෙමු. ඔවුන්ගේ වාසස්ථානය නිරය වන්නේය. එය නිවී යන සෑමවිටම අපි ඔවුන් සඳහා දැවීම වැඩි කරන්නෙමු.

ذٰلِكَ جَزَآؤُهُمْ بِاَنَّهُمْ كَفَرُوْا بِاٰيٰتِنَا وَقَالُوْۤا ءَاِذَا كُنَّا عِظَامًا وَّرُفَاتًا ءَاِنَّا

99. ඔවුන්ගේ ප්‍රතිවිපාකය එය වේ. මන්දයත් ඔවුන් අපගේ සළකුණු ප්‍රතික්ෂේප කර (මෙසේ) පැවසූහ.

لَمَبۡعُوۡثُوۡنَ خَلۡقًا جَدِيۡدًا ﴿٩٩﴾

'කිමද! අප ඇටකටු සහ කැඩුන කැබලි වලට පත්වූ විට සත්තකින්ම අප නව නිර්මාණයක් ලෙස නැගිටවනු ලබන්නේද?'

اَوَلَمۡ يَرَوۡا اَنَّ اللّٰهَ الَّذِىۡ خَلَقَ السَّمٰوٰتِ وَالۡاَرۡضَ قَادِرٌ عَلٰٓى اَنۡ يَّخۡلُقَ مِثۡلَهُمۡ وَجَعَلَ لَهُمۡ اَجَلًا لَّا رَيۡبَ فِيۡهِ ؕ فَاَبَى الظّٰلِمُوۡنَ اِلَّا كُفُوۡرًا ﴿١٠٠﴾

100. අහස් සහ පොළොව මැවූ අල්ලාහ්ට ඔවුන් වැනි අයව මැවීමට බලය ඇති බව ඔවුන් දැක නොතිබේද? තවද ඔහු ඔවුන්ට කාල සීමාවක් නියම කර ඇත. ඒ ගැන කිසිදු සැකයක් නැත. නමුත් වරදකරුවන් අවිශ්වාසිතකම හැර අන් සියල්ලම ප්‍රතික්ෂේප කළෝය.

قُلۡ لَّوۡ اَنۡتُمۡ تَمۡلِكُوۡنَ خَزَآٮِٕنَ رَحۡمَةِ رَبِّىۡۤ اِذًا لَّاَمۡسَكۡتُمۡ خَشۡيَةَ الۡاِنۡفَاقِ ؕ وَكَانَ الۡاِنۡسَانُ قَتُوۡرًا ﴿١٠١﴾

101. 'මාගේ අධිපතියාණන්ගේ දයාලු භාවයේ වස්තූන් නුඹලාට හිමි වූයේ නම්, නියතවශයෙන්ම නුඹලා ඒවා වැය වන්නේ යැයි බියෙන් රඳවා තබා ගන්නෙහුය. නියතවශයෙන්ම මිනිසා ඉතා මසුරු යැ'යි පවසන්න.

وَلَـقَدۡ اٰتَيۡنَا مُوۡسٰى تِسۡعَ اٰيٰتٍۢ بَيِّنٰتٍ فَسۡـَٔلۡ بَنِىۡۤ اِسۡرَآءِيۡلَ اِذۡ جَآءَهُمۡ فَقَالَ لَهٗ فِرۡعَوۡنُ اِنِّىۡ لَاَظُنُّكَ يٰمُوۡسٰى مَسۡحُوۡرًا ﴿١٠٢﴾

102. තවද නියතවශයෙන්ම අපි මූසාට පැහැදිලි සළකුණු නවයක් දුන්නෙමු. එබැවින් ඉස්රාඊලයේ දරුවන්ගෙන් අසන්න. ඔහු ඔවුන් වෙත පැමිණි කල්හි, 'එම්බල මූසා ඔබ මායාවට ලක්වී ඇත්තෙකු බව මම සිතමි'යි ෆිර්අවුන් ඔහුට කීවේය.

قَالَ لَقَدۡ عَلِمۡتَ مَاۤ اَنۡزَلَ هٰٓؤُلَۤاءِ اِلَّا رَبُّ السَّمٰوٰتِ وَالۡاَرۡضِ بَصَآٮِٕرَ ۚ وَاِنِّىۡ لَاَظُنُّكَ يٰفِرۡعَوۡنُ مَثۡبُوۡرًا ﴿١٠٣﴾

103. ඔහු, '(බොහෝ) ප්‍රත්‍යක්ෂ සාධක වශයෙන් මේවා(සළකුණු) පහළ කර ඇත්තේ අහස් සහ පොළොවේ අධිපතියාණන් හැර අන් කිසිවෙක් නොවන බව නුඹ ඉතා හොඳින් දන්නෙහිය. එම්බා ෆිර්අවුන්! විනාශයට ලක්වන (මිනිසෙකු) ලෙස නියතවශයෙන්ම මම නුඹ ගැන සිතමි'යි කීවේය.

فَاَرَادَ اَنۡ يَّسۡتَفِزَّهُمۡ مِّنَ الۡاَرۡضِ فَاَغۡرَقۡنٰهُ وَمَنۡ مَّعَهٗ جَمِيۡعًا ۙ ﴿١٠٤﴾

104. එබැවින් ඔහු(ෆිර්අවුන්) ඔවුන්ව රටින් බැහැර කිරීමට තීරණය කළේය. එහෙත් ඔහු සහ ඔහු සමග සිටි සියල්ලන්වම අපි ගිල්වා දැමුවෙමු.

وَّقُلْنَا مِنۢ بَعْدِهٖ لِبَنِىٓ اِسْرَآءِيْلَ اسْكُنُوا الْاَرْضَ فَاِذَا جَآءَ وَعْدُ الْاٰخِرَةِ جِئْنَا بِكُمْ لَفِيْفًا ﴿١٠٥﴾

*105. තවද ඔහු(වන ෆිර්අවුන්)ගෙන් පසුව 'නුඹලා මෙම (පොරොන්දු වූ) රටෙහි වාසය කරනු. තවද (මුස්ලිම් වරුන් සඳහා) දෙවන වරට පොරොන්දු වූ (දඬුවම) පැමිණෙන අවස්ථාවේදී අපි නුඹලා සියල්ලන්වම තවත් වරක් ගෙන එන්නෙමු'යි අපි ඉස්රාඊලයේ දරුවන්ට කීවෙමු.

وَبِالْحَقِّ اَنْزَلْنٰهُ وَبِالْحَقِّ نَزَلَ ؕ وَمَآ اَرْسَلْنٰكَ اِلَّا مُبَشِّرًا وَّنَذِيْرًا ﴿١٠٦﴾

106 තවද අපි මෙය(කුර්ආනය) සත්‍යය සමග පහළ කළෙමු. එමෙන්ම මෙය සත්‍යය සමගම පහළ විය. තවද අපි ඔබව ශුභාරංචි ගෙනෙන්නෙකු සහ අවවාද කරන්නෙකු මිස නොඑව්වෙමු.

وَقُرْاٰنًا فَرَقْنٰهُ لِتَقْرَاَهٗ عَلَى النَّاسِ عَلٰى مُكْثٍ وَّنَزَّلْنٰهُ تَنْزِيْلًا ﴿١٠٧﴾

107. තවද අපි කුර්ආනය කොටස් වලට බෙදා ඇත්තේ ඔබ එය විටින් විට මිනිසුන් ඉදිරියේ පාරායනා කරනු පිණිසය. තවද අපි එය ක්‍රමක්‍රමයෙන් පහළ කර ඇත්තෙමු.

قُلْ اٰمِنُوْا بِهٖٓ اَوْ لَا تُؤْمِنُوْا ؕ اِنَّ الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ مِنْ قَبْلِهٖٓ اِذَا يُتْلٰى عَلَيْهِمْ يَخِرُّوْنَ لِلْاَذْقَانِ سُجَّدًا ۙ﴿١٠٨﴾

108. පවසන්න, "නුඹලා එය කෙරෙහි විශ්වාස කළද, නැතහොත් විශ්වාස නොකළද, එයට පෙර දැනුම දෙන ලද අයට එය පාරායනය කරනු ලැබූ කල්හි ඔවුන් අවනත වෙමින් තමන්ගේ මුණින් වැටෙන්නෝය.

وَّيَقُوْلُوْنَ سُبْحٰنَ رَبِّنَآ اِنْ كَانَ وَعْدُ رَبِّنَا لَمَفْعُوْلًا ﴿١٠٩﴾

109. තවද 'අපගේ අධිපතියාණන් සුවිශුද්ධය. නියතවශයෙන්ම අප අධිපතියාණන්ගේ පොරොන්දුව ඉටුකරනු ලබන්නේම යැ'යි පවසති".

وَيَخِرُّوْنَ لِلْاَذْقَانِ يَبْكُوْنَ وَيَزِيْدُهُمْ خُشُوْعًا ﴿١١٠﴾ السجدة

110. ඔවුහු වැලපෙමින් මුණින් වැටෙති. තවද එය ඔවුන් තුළ නිහතමානිත්වය වැඩි කරයි.

*සටහන: 105. යුදෙව්වන් ගැන වූ දෙවන පොරොන්දුව මෙයට පෙර සටහන 5 සිට 9 හි සඳහන් කර ඇත. එහෙත් මෙම වාක්‍යයේ දෙවන පොරොන්දුව නැවත වතාවක් සඳහන් වී තිබෙන නිසා මෙය වෙනත් පොරොන්දුවක් යැයි පැහැදිලි වේ. මෙම පොරොන්දුව මුස්ලිම්වරුන් සම්බන්ධව විය හැකිය. එම නිසා මෙය 'මුස්ලිම්වරුන් සඳහා' යැයි වරහන් තුළ දක්වා ඇත. මෙම අදහස අල්කුර්ආනය විවරණය කරන්නන් මීට පෙරද සඳහන් කර ඇත. (අල්ලාමා ශව්කානි- ෆත්හුල් බයාන්).

තවද මෙහි "අපි නුඹලා සියල්ලන්වම 'තවත් වරක්' ගෙන එන්නෙමු" යන වාක්‍යයේ, යුදෙව්වන්ව තෙවන වතාවට පලස්තීනයෙහි එක්රැස් කරන්නෙමු යන මෙම අනාවැකියට අනුව වර්තමාන යුගයේ බනී ඉස්රාඊල්වරුන් පලස්තීනය අත්පත් කරගෙන ඇත.

111. 'අල්ලාහ් යැයි කැඳවනු, නැත්නම් රහ්මාන් යැයි කැඳවනු. නුඹලා ඔහුව කුමන නමකින් කැඳවූවද ඔහුට ඉතා අලංකාර නාමයන් ඇතැ'යි පවසන්න. තවද ඔබගේ නමස්කාරය උස් හඬින් ඉටු නොකරන්න. එමෙන්ම එය හීන් හඬකින්ද නොකරන්න. නමුත් අතරමැදි මාර්ගය තෝරාගන්න.

قُلِ ادْعُوا اللَّهَ أَوِ ادْعُوا الرَّحْمَٰنَ ۖ أَيًّا مَّا تَدْعُوا فَلَهُ الْأَسْمَاءُ الْحُسْنَىٰ ۚ وَلَا تَجْهَرْ بِصَلَاتِكَ وَلَا تُخَافِتْ بِهَا وَابْتَغِ بَيْنَ ذَٰلِكَ سَبِيلًا ﴿١١١﴾

112. තවද 'සියළු ප්‍රශංසා අල්ලාහ්ට අයත්ය. ඔහු කිසිසේත් (තමාට) පුතෙකු ගෙන නැත, තවද (ඔහුගේ) රාජධානියෙහි ඔහුට හවුල් කරුවෙකුද නොමැත. තවද බෙලහීන තත්ත්වයක මෙන් ඔහුට පිහිට වීමට කිසිසේත් කිසිවෙකු අවශ්‍ය වූයේද නැතැ'යි පවසන්න. තවද ඔහුගේ කීර්තිය බෙහෙවින් උත්කෘෂ්ට කරන්න.

وَقُلِ الْحَمْدُ لِلَّهِ الَّذِي لَمْ يَتَّخِذْ وَلَدًا وَلَمْ يَكُن لَّهُ شَرِيكٌ فِي الْمُلْكِ وَلَمْ يَكُن لَّهُ وَلِيٌّ مِّنَ الذُّلِّ ۖ وَكَبِّرْهُ تَكْبِيرًا ﴿١١٢﴾




අල් කහ්ෆ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡحَمۡدُ لِلّٰهِ الَّذِىۡۤ اَنۡزَلَ عَلٰى عَبۡدِهِ الۡكِتٰبَ وَلَمۡ يَجۡعَلْ لَّهٗ عِوَجًا ۜ ﴿٢﴾

*2. සියළු ප්‍රශංසා අල්ලාහ්ටම අයත්ය. ඔහු සිය දාසයා වෙත මෙම ග්‍රන්ථය පහළ කර ඇත. තවද ඔහු තුල (මුහම්මද් තුල) හෝ මෙය ඇති කිරීමෙහි හෝ ඔහු කිසිදු විකෘති බවක් නොතැබුවේය.

قَيِّمًا لِّيُنۡذِرَ بَاۡسًا شَدِيۡدًا مِّنۡ لَّدُنۡهُ وَيُبَشِّرَ الۡمُؤۡمِنِيۡنَ الَّذِيۡنَ يَعۡمَلُوۡنَ الصّٰلِحٰتِ اَنَّ لَهُمۡ اَجۡرًا حَسَنًا ۙ ﴿٣﴾

3. (ඔහු මෙය) රැකවරණයක් (කර ඇත්තේ) ඔහු වෙතින් බරපතල දඬුවම පිළිබඳව අවවාද දෙනු පිණිසත් යහපත් ක්‍රියාවන්හි යෙදෙන විශ්වාසිතයින්ට යහපත් තිළිණයක් ලැබෙන බවට ශුභාරංචි දෙනු පිණිසත්ය.

مّٰكِثِيۡنَ فِيۡهِ اَبَدًا ۙ ﴿٤﴾

4. ඔවුහු එහි සදාකාලිකවම වෙසෙන්නෝය.

وَّيُنۡذِرَ الَّذِيۡنَ قَالُوا اتَّخَذَ اللّٰهُ وَلَدًا ۗ ﴿٥﴾

5. තවද අල්ලාහ් ඔහුට පුතෙකු ගෙන ඇත්තේ යැයි පවසන අයට මෙය අවවාද කරනු පිණිසද වේ.

مَا لَهُمۡ بِهٖ مِنۡ عِلۡمٍ وَّلَا لِاٰبَآٮِٕهِمۡ ؕ كَبُرَتۡ كَلِمَةً تَخۡرُجُ مِنۡ اَفۡوَاهِهِمۡ ؕ اِنۡ يَّقُوۡلُوۡنَ اِلَّا كَذِبًا ﴿٦﴾

6. ඒ පිළිබඳව ඔවුන්ට දැනුමක් නොමැත. ඔවුන්ගේ පියවරුන්ටද නොමැත. ඔවුන්ගේ මුවින් පිටවන වදන් බරපතල වේ. ඔවුහු මුසාබස් හැරෙන්නට අන්කිසිවක් නොපවසති.

*සටහන. 2: ( لَهٗ ) 'ලහු' යන වදනෙහි එන ( هٗ ) 'හු' නම් සර්වනාමය මෙම ග්‍රන්ථයටද ග්‍රන්ථය ලබන්නාවූ අල්ලාහ්ගේ දාසයාටද එක සමානව භාවිතා වේ. එම නිසා මෙම සර්වනාම දෙකටම එකවර ගැලපෙන සේ සිංහල බසින් එය පරිවර්තනය කිරීමට නොහැක. මෙහි දෙවියන් කිසිදු විකෘති බවක් නොතැබුවේය යනුවෙන් කවරෙක් හෝ පරිවර්තනය කළේ නම් එය මුහම්මද් (සල්) තුමාණන්ව ඉහත පිවිතුරු පොරොන්දුවෙන් ඉවත් කිරීමකි. තවද මෙය ඔහු තුල (මුහම්මද් තුල) ඔහු කිසිදු විකෘති බවක් නොතැබුවේය යනුවෙන් කෙනෙක් පරිවර්තනය කළේ නම් එය ග්‍රන්ථයේ පරිශුද්ධ භාවය ඉවත් කිරීමකි. මෙම ගැටලුව නිරාකරණය කිරීම සඳහා අපි වෙනත් අකාරයට මෙහි එන වචනය ඕනෑවට වඩා අවධාරණය නොකර ආත්මයට මුළුමනින්ම යුක්තිගරුක වී පරිවර්තනය කර ඇත්තෙමු.

فَلَعَلَّكَ بَاخِعٌ نَّفْسَكَ عَلَىٰٓ اٰثَارِهِمْ اِنْ لَّمْ يُؤْمِنُوْا بِهٰذَا الْحَدِيْثِ اَسَفًا ﴿٧﴾

7. මෙම අනුශාසනාව කෙරෙහි ඔවුන් විශ්වාස නොකළහොත් ඔවුන් වෙනුවෙන් දුක් වී ඔබ තමාවම නැතිකර ගන්නෙහිද?

اِنَّا جَعَلْنَا مَا عَلَى الْاَرْضِ زِيْنَةً لَّهَا لِنَبْلُوَهُمْ اَيُّهُمْ اَحْسَنُ عَمَلًا ﴿٨﴾

8. සැබැවින්ම අපි පොළොව මත ඇති සියල්ලක්ම ඊට අලංකාරයක් ලෙස සාදා ඇත්තෙමු. එය ඔවුන්ගෙන් කවරෙක් ක්‍රියාවෙහි වඩා හොඳදැයි අප පිරික්සීම සඳහාය.

وَاِنَّا لَجٰعِلُوْنَ مَا عَلَيْهَا صَعِيْدًا جُرُزًا ﴿٩﴾

9. තවද ඒ මත ඇති සියල්ලම අපි නිසරු පස් බිමක් බවට පත් කරන්නෙමු.

اَمْ حَسِبْتَ اَنَّ اَصْحٰبَ الْكَهْفِ وَالرَّقِيْمِ كَانُوْا مِنْ اٰيٰتِنَا عَجَبًا ﴿١٠﴾

10. ගුහා වාසීන්ද ශිලාලේඛන වාසීන්ද අපගේ සලකුණු අතුරින් අපූරු යැයි ඔබ සිතන්නෙහිද?

اِذْ اَوَى الْفِتْيَةُ اِلَى الْكَهْفِ فَقَالُوْا رَبَّنَآ اٰتِنَا مِنْ لَّدُنْكَ رَحْمَةً وَّهَيِّئْ لَنَا مِنْ اَمْرِنَا رَشَدًا ﴿١١﴾

11. ඇතැම් තරුණයින් ගුහාව තුළ සරණපැතූ කල්හි, 'අපගේ අධිපතියාණෙනි! ඔබ වෙතින් වූ දයාව අප වෙත පිරිනමනු මැනව. තවද අපගේ කටයුත්තෙහි අපට නිවැරදි මගපෙන්වීම සලසා දෙනු මැනව'යි කීහ.

فَضَرَبْنَا عَلَىٰٓ اٰذَانِهِمْ فِى الْكَهْفِ سِنِيْنَ عَدَدًا ﴿١٢﴾

12. එබැවින් අපි ඔවුන්ව ගුහාවෙහි (බාහිර ලෝකයේ තොරතුරු) ඇසීමෙන් අවුරුදු කිහිපයකට වළක්වා තැබුවෙමු.

ثُمَّ بَعَثْنٰهُمْ لِنَعْلَمَ اَيُّ الْحِزْبَيْنِ اَحْصٰى لِمَا لَبِثُوْٓا اَمَدًا ﴿١٣﴾

13. පසුව එම දෙපිරිස් අතුරින් ඔවුන් නැවති සිටි කාලය වඩාත් හොඳින් ගණන් බලන්නේ කවුරුන්දැයි අප දැනගනු පිණිස අපි ඔවුන්ව අවදි කළෙමු.

نَحْنُ نَقُصُّ عَلَيْكَ نَبَاَهُمْ بِالْحَقِّ اِنَّهُمْ فِتْيَةٌ اٰمَنُوْا بِرَبِّهِمْ وَزِدْنٰهُمْ هُدًى ﴿١٤﴾

14. අපි ඔවුන්ගේ වෘතාන්තය සත්‍යයෙන් යුතුව ඔබට විස්තර කර දෙන්නෙමු. ඔවුන් සිය අධිපතියාණන් කෙරෙහි විශ්වාස කළ තරුණයින් වූහ. තවද අපි ඔවුන්ව මග පෙන්වීමෙහි වර්ධනය කළෙමු.

وَّرَبَطْنَا عَلٰى قُلُوْبِهِمْ اِذْ قَامُوْا فَقَالُوْا رَبُّنَا رَبُّ السَّمٰوٰتِ وَالْاَرْضِ لَنْ نَّدْعُوَا۠ مِنْ دُوْنِهٖٓ اِلٰهًا لَّقَدْ قُلْنَآ اِذًا شَطَطًا ﴿١٥﴾

15. තවද ඔවුන් නැගිට සිට, 'අපගේ අධිපතියාණන් අහස් සහ පොළොවේ අධිපතියාණන්ය. අපි ඔහු හැර වෙනත් දෙවියෙකු කිසිවිටෙකත් නොකැඳවන්නෙමු. (අප එසේ කළේ නම්) සැබැවින්ම අපි බරපතල දෙයක් පවසා ඇත්තෙමු'යි කියූ කල්හි, අපි ඔවුන්ගේ හදවත් ශක්තිමත් කළෙමු.

هٰٓؤُلَاۤءِ قَوْمُنَا اتَّخَذُوْا مِنْ دُوْنِهٖٓ اٰلِهَةً ؕ لَوْلَا يَاْتُوْنَ عَلَيْهِمْ بِسُلْطٰنٍ بَيِّنٍ ؕ فَمَنْ اَظْلَمُ مِمَّنِ افْتَرٰى عَلَى اللّٰهِ كَذِبًا ؕ ﴿١٦﴾

16. 'මේ අපගේ ජනතාව, ඔහු හැර (වෙනත්) දෙවිවරුන්ව (නැමදුම් කිරීම සඳහා) ඇතිකර ගත්හ. ඔවුන් ඒ සඳහා පැහැදිලි සාධකයක් ගෙන නොඑන්නේ මක් නිසාද? තවද අල්ලාහ් පිළිබඳව බොරු ගොතන්නාට වඩා අදමිටුවා වන්නේ අන් කවරෙක්ද?'

وَاِذِ اعْتَزَلْتُمُوْهُمْ وَمَا يَعْبُدُوْنَ اِلَّا اللّٰهَ فَاْوٗٓا اِلَى الْكَهْفِ يَنْشُرْ لَكُمْ رَبُّكُمْ مِّنْ رَّحْمَتِهٖ وَيُهَيِّئْ لَكُمْ مِّنْ اَمْرِكُمْ مِّرْفَقًا ﴿١٧﴾

17. තවද නුඹලා ඔවුන්ගෙන්ද අල්ලාහ් හැර ඔවුන් නැමදුම් කළ දෙයින්ද ඉවත් වූවායින් පසු ගුහාවෙහි සරණ පතනු. නුඹලාගේ අධිපතියාණන් ඔහුගේ දයාව නුඹලාට පතුරුවන්නේය. තවද නුඹලාගේ (මෙම) කටයුත්තෙහි නුඹලාට පහසුව සලස්වන්නේය.

وَتَرَى الشَّمْسَ اِذَا طَلَعَتْ تَّزٰوَرُ عَنْ كَهْفِهِمْ ذَاتَ الْيَمِيْنِ وَاِذَا غَرَبَتْ تَّقْرِضُهُمْ ذَاتَ الشِّمَالِ وَهُمْ فِيْ فَجْوَةٍ مِّنْهُ ؕ ذٰلِكَ مِنْ اٰيٰتِ اللّٰهِ ؕ مَنْ يَّهْدِ اللّٰهُ فَهُوَ الْمُهْتَدِ ۚ وَمَنْ يُّضْلِلْ فَلَنْ تَجِدَ لَهٗ وَلِيًّا مُّرْشِدًا ﴿١٨﴾ ع

18 තවද සූර්යයා උදා වන විට එය ඔවුන්ගේ ගුහාවේ දකුණු පසින් ඈත්ව යැමත් තවද එය බැස යන විට ඔවුන්ගේ වම් පස හරහා ගමන් කිරීමත් ඔබට දැක ගත හැක. ඔවුහු එහි එළිමහන් ස්ථානයක වූහ. මෙය අල්ලාහ්ගේ සළකුණු අතර වේ. අල්ලාහ් කවරෙකුට මග පෙන්වන්නේද ඔහු යහමග ලද්දාය. නමුත් ඔහු කවරෙකුව නොමග යැමට ඉඩ හරින්නේද ඔහුට කිසිදු උදව් කරුවෙකු (හෝ) මග පෙන්වන්නෙකු ඔබ නොදකින්නෙහිය.

وَتَحْسَبُهُمْ اَيْقَاظًا وَّهُمْ رُقُوْدٌ ۖۗ

19. තවද ඔවුන් අවදිව සිටින්නේ යැයි ඔබ අදහස් කරනු ඇත. එහෙත්

*ඔවුහු නින්දෙහිය. තවද අපි ඔවුන්ව දකුණු පසටත් වම් පසටත් හැරෙන්නට සලස්වන්නෙමු. තවද ඔවුන්ගේ සුනඛයා තම ඉදිරි පාද දෙක දොරකඩහි දිගහැර තබා ඇත. ඔබ ඔවුන්දෙස බැල්ම යොමු කළේ නම් නියතවශයෙන්ම ඔබ තිගැස්සී ඔවුන්ගෙන් හැරී පළායනු ඇත. තවද නියතවශයෙන්ම ඔබ ඔවුන් නිසා භීතියෙන් පිරීයනු ඇත.

وَّنُقَلِّبُهُمْ ذَاتَ الْيَمِينِ وَذَاتَ الشِّمَالِ ۖ وَكَلْبُهُم بَاسِطٌ ذِرَاعَيْهِ بِالْوَصِيدِ ۚ لَوِ اطَّلَعْتَ عَلَيْهِمْ لَوَلَّيْتَ مِنْهُمْ فِرَارًا وَّلَمُلِئْتَ مِنْهُمْ رُعْبًا ﴿١٩﴾

20. තවද එලෙස ඔවුන් එකිනෙකාගෙන් ප්‍රශ්න කරනු පිණිස අපි ඔවුන්ව අවදි කළෙමු. ඔවුනතුරින් කතාකරන්නෙක් 'නුඹලා කොපමණ කලක් ගතකර ඇත්තෙහුද?'යි ඇසීය. ඔවුහු 'අප දවසක් හෝ දවසකින් කොටසක් ගතකර ඇත්තෙමු'යි කීහ. (එයට අනෙක් අය) 'නුඹලාගේ අධිපතියාණන් නුඹලා ගතකර ඇති කාලය ගැන ඉතා මැනැවින් දනියි. දැන් නුඹලාගේ මේ රිදී කාසි සමග නුඹලාගෙන් කෙනෙකුව නගරයට යවනු. එහි (වැසියන්ගේ) පිවිතුරුම ආහාරය කුමක්දැයි ඔහු දැනගත යුතුය. තවද එයින් ඔහු නුඹලාට බොජුන් රැගෙන ආ යුතුය. ඔහු අවධානමින් සිටිය යුතුය. තවද ඔහු නුඹලා ගැන කිසිවෙකුටත් නොදන්වා සිටිය යුතුයැ'යි කීහ.

وَكَذَٰلِكَ بَعَثْنَاهُمْ لِيَتَسَاءَلُوا بَيْنَهُمْ ۚ قَالَ قَائِلٌ مِّنْهُمْ كَمْ لَبِثْتُمْ ۖ قَالُوا لَبِثْنَا يَوْمًا أَوْ بَعْضَ يَوْمٍ ۚ قَالُوا رَبُّكُمْ أَعْلَمُ بِمَا لَبِثْتُمْ فَابْعَثُوا أَحَدَكُم بِوَرِقِكُمْ هَٰذِهِ إِلَى الْمَدِينَةِ فَلْيَنظُرْ أَيُّهَا أَزْكَىٰ طَعَامًا فَلْيَأْتِكُم بِرِزْقٍ مِّنْهُ وَلْيَتَلَطَّفْ وَلَا يُشْعِرَنَّ بِكُمْ أَحَدًا ﴿٢٠﴾

نصف القرآن باعتبار عدد الحروف بان التاء بعد الياء من النصف الاول واللام الثانية من النصف الأخير

21. 'ඒ මන්ද යත් ඔවුන් නුඹලා කෙරෙහි අභිබවා ගියේ නම් ඔවුන් නුඹලාට ගල් ගසා මැරීමේ දඬුවම දෙනු ඇත. තවද නුඹලාව ඔවුන්ගේ ආගම වෙතට හරවනු ඇත. එසේ වී නම් නුඹලා කිසිවිටෙකත් ජය නොලබන්නෙහුය.'

إِنَّهُمْ إِن يَظْهَرُوا عَلَيْكُمْ يَرْجُمُوكُمْ أَوْ يُعِيدُوكُمْ فِي مِلَّتِهِمْ وَلَن تُفْلِحُوا إِذًا أَبَدًا ﴿٢١﴾

22. තවද අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍ය බවත් එම හෝරාව සම්බන්ධව

وَكَذَٰلِكَ أَعْثَرْنَا عَلَيْهِمْ لِيَعْلَمُوا أَنَّ

*සටහන. 19: ගුහා වාසින් ලෝකයේ සියළු දෙසට පැතිරෙන්නෝය. මේ ආකාරයෙන් පැතිරෙන ජන සමූහය යුරෝපීය කිතුණුවන්ය. එමනිසා අස්හාබුල් කහ්ෆ් යනුවෙන් පෙන්වාදෙන්නේ මොවුන් පිළිබඳවය. නිවසෙහි ඇති කරන බල්ලා නිවස ආරක්ෂා කිරීම සඳහා පිටත සිටින විට උගේ ඉදිරිපාද දෙක දිගහැර සිටියි. බහුතර යුරෝපීය ජනයා බල්ලන් ඇති කරති. මේ වාක්‍යයෙහි පෙන්වා දෙනු ලබන්නේ මේ පිළිබඳවය.

වීහි කිසිදු සැකයක් නැති බවත් ඔවුන් දැනගනු පිණිස මෙයාකාරයට අපි ඔවුන් ගැන (ජනතාවට) දැනුවත් කළෙමු. (තවද) ජනතාව තමන් අතර ඔවුන් පිළිබඳව තර්ක කර 'ඔවුන් (විසූ ස්ථානය) මත ස්මාරකයක් තනනු'යි කියූ කල්හි (එම අවස්ථාව සිහිපත් කරනු). ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන් ගැන ඉතා මැනැවින් දන්නේය. තමන්ගේ කාර්යයෙහි ජයගත් අය 'නියතවශයෙන්ම අපි ඔවුන් (විසූ ස්ථානය) මත නැමදුම් ස්ථානයක් තනන්නෙමු'යි කීහ.

وَعْدَ اللّٰهِ حَقٌّ وَّاَنَّ السَّاعَةَ لَا رَيْبَ فِيْهَا ۚ اِذْ يَتَنَازَعُوْنَ بَيْنَهُمْ اَمْرَهُمْ فَقَالُوا ابْنُوْا عَلَيْهِمْ بُنْيَانًا ؕ رَبُّهُمْ اَعْلَمُ بِهِمْ ؕ قَالَ الَّذِيْنَ غَلَبُوْا عَلٰٓى اَمْرِهِمْ لَنَتَّخِذَنَّ عَلَيْهِمْ مَّسْجِدًا ﴿٢٢﴾

23. (සමහරු) 'ඔවුහු තිදෙනෙක් වූහ. සිව්වැන්නා ඔවුන්ගේ සුනඛයා වූයේ' යැයි පවසති. තවද (අනෙක් අය) 'ඔවුහු පස් දෙනෙක් වූහ. සයවැන්නා ඔවුන්ගේ සුනඛයා වූයේ' යැයි නොසිතා අනුමානයෙන් පවසති. එමෙන්ම (තවත් සමහරු) 'ඔවුහු සත් දෙනෙක් වූහ. අටවැන්නා ඔවුන්ගේ සුනඛයා වූයේ' යැයි පවසති. 'මාගේ අධිපතියාණන් ඔවුන්ගේ සැබෑ ගණන කොපමණ වී දැයි ඉතා මැනැවින් දනියි. ඔවුන් පිළිබඳව දන්නේ ඉතා ස්වල්ප දෙනෙක්මය. එමනිසා සරලව සාකච්ඡා කිරීම හැරෙන්නට ඔවුන් පිළිබඳව තර්ක නොකරන්න. තවද ඔවුන් කිසිවෙකුගෙන් ඔවුන් පිළිබඳව තොරතුරු නොවිමසන්නැ' යි පවසන්න.

سَيَقُوْلُوْنَ ثَلٰثَةٌ رَّابِعُهُمْ كَلْبُهُمْ ۚ وَيَقُوْلُوْنَ خَمْسَةٌ سَادِسُهُمْ كَلْبُهُمْ رَجْمًا بِالْغَيْبِ ۚ وَيَقُوْلُوْنَ سَبْعَةٌ وَّثَامِنُهُمْ كَلْبُهُمْ ؕ قُلْ رَّبِّيْٓ اَعْلَمُ بِعِدَّتِهِمْ مَّا يَعْلَمُهُمْ اِلَّا قَلِيْلٌ ۬ فَلَا تُمَارِ فِيْهِمْ اِلَّا مِرَآءً ظَاهِرًا ۪ وَّلَا تَسْتَفْتِ فِيْهِمْ مِّنْهُمْ اَحَدًا ﴿٢٣﴾

24. තවද කිසිම දෙයක් ගැන 'නියතවශයෙන්ම මම එය හෙට කරන්නෙමි'යි නොපවසන්න,

وَلَا تَقُوْلَنَّ لِشَايْءٍ اِنِّيْ فَاعِلٌ ذٰلِكَ غَدًا ۙ ﴿٢٤﴾

25. අල්ලාහ් අභිමත වුවා මිස. තවද (එය) ඔබට අමතක වූ විට ඔබගේ අධිපතියාණන්ව සිහිකර 'මාගේ අධිපතියාණන් මෙයටත් වඩා සමීප නිවැරදි මග වෙත මා යොමු කරනු ඇතැයි මම බලාපොරොත්තු වෙමි'යි පවසන්න.

اِلَّآ اَنْ يَّشَآءَ اللّٰهُ ۫ وَاذْكُرْ رَّبَّكَ اِذَا نَسِيْتَ وَقُلْ عَسٰٓى اَنْ يَّهْدِيَنِ رَبِّيْ لِاَقْرَبَ مِنْ هٰذَا رَشَدًا ﴿٢٥﴾

وَلَبِثُوْا فِيْ كَهْفِهِمْ ثَلٰثَ مِائَةٍ سِنِيْنَ وَازْدَادُوْا تِسْعًا ﴿٢٦﴾

26. තවද ඔවුහු අවුරුදු තුන්සියයක් ඔවුන්ගේ ගුහාවෙහි නැවති සිටියහ. තවද එයට තවත් නවයක් එකතු කළහ.

قُلِ اللّٰهُ اَعْلَمُ بِمَا لَبِثُوْا ۚ لَهٗ غَيْبُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ اَبْصِرْ بِهٖ وَاَسْمِعْ ؕ مَا لَهُمْ مِّنْ دُوْنِهٖ مِنْ وَّلِيٍّ ۖ وَّلَا يُشْرِكُ فِيْ حُكْمِهٖٓ اَحَدًا ﴿٢٧﴾

27. පවසන්න, 'ඔවුන් එහි කොපමණ කාලයක් ගත කළේදැයි අල්ලාහ් මැනැවින් දන්නේය.' අහස්හිද පොළොවෙහිද ඇති අදෘශ්‍යමාන දේ ඔහුටම අයත්ය. ඔහු කෙතරම් විශිෂ්ඨ දකින්නෙක්ද! කෙතරම් විශිෂ්ඨ අසන්නෙක්ද! ඔහු හැර ඔවුනට මිතුරෙක් නොමැත. තවද ඔහු තම ආධිපත්‍යයෙහි හවුල් වීමට කිසිවෙකුටත් අවසර නොදෙන්නේය.

وَاتْلُ مَآ اُوْحِيَ اِلَيْكَ مِنْ كِتَابِ رَبِّكَ ۚ لَا مُبَدِّلَ لِكَلِمٰتِهٖ ۚ وَلَنْ تَجِدَ مِنْ دُوْنِهٖ مُلْتَحَدًا ﴿٢٨﴾

28. තවද ඔබ අධිපතියාණන්ගේ ග්‍රන්ථයෙන් ඔබ වෙත අනාවරණය කරන ලද දේ පාරායනය කරන්න. ඔහුගේ වදන් වෙනස් කළ හැකි කිසිවෙක් නැත. තවද ඔහු හැර කිසිදු සරණක් ඔබ නොලබන්නෙහිය.

وَاصْبِرْ نَفْسَكَ مَعَ الَّذِيْنَ يَدْعُوْنَ رَبَّهُمْ بِالْغَدٰوةِ وَالْعَشِيِّ يُرِيْدُوْنَ وَجْهَهٗ وَلَا تَعْدُ عَيْنٰكَ عَنْهُمْ ۚ تُرِيْدُ زِيْنَةَ الْحَيٰوةِ الدُّنْيَا ۚ وَلَا تُطِعْ مَنْ اَغْفَلْنَا قَلْبَهٗ عَنْ ذِكْرِنَا وَاتَّبَعَ هَوٰىهُ وَكَانَ اَمْرُهٗ فُرُطًا ﴿٢٩﴾

29. තවද තම අධිපතියාණන්ට ඔහුගේ තෘප්තිය තකා උදේ සහ සවස යදින අය සමග ඔබ ඉවසිලිවන්ත වන්න. තවද ලෞකික ජීවිතයේ අලංකාරයට ඔබ කැමතිව් ඔබගේ නෙත් ඔවුන්ගෙන් ඉවත් නොවිය යුතුය. තවද අප කවරෙකුගේ හදවත අපව සිහිපත් කිරීමෙන් නොසැලකිලිමත් කළේද ඔහුට අවනත නොවන්න. තවද ඔහු තම දුෂ්ඨ අභිලාෂයන් අනුගමනය කරයි. තවද ඔහුගේ තත්ත්වය සියලු සීමාවන් ඉක්මවා ගොස් ඇත.

وَقُلِ الْحَقُّ مِنْ رَّبِّكُمْ ۗ فَمَنْ شَآءَ فَلْيُؤْمِنْ وَّمَنْ شَآءَ فَلْيَكْفُرْ ۙ اِنَّآ اَعْتَدْنَا لِلظّٰلِمِيْنَ نَارًا ۙ اَحَاطَ بِهِمْ

30. තවද පවසන්න, 'මෙම සත්‍යය නුඹලාගේ අධිපතියාණන් වෙතින්ය. එබැවින් කවරෙක් කැමති වන්නේද ඔහු විශ්වාස කරත්වා. තවද කවරෙක් කැමති වන්නේද ඔහු අවිශ්වාස කරත්වා'. සැබැවින්ම වරදකරුවන් සඳහා අපි ගින්නක් පිළියෙල කර

سُرَادِقُهَا ۚ وَإِن يَسْتَغِيثُوا يُغَاثُوا بِمَاءٍ كَالْمُهْلِ يَشْوِي الْوُجُوهَ ۚ بِئْسَ الشَّرَابُ وَسَاءَتْ مُرْتَفَقًا ﴿٣٠﴾

ඇත්තෙමු. එහි ඇවිලෙන බිත්ති ඔවුන්ව කොටුකර ගන්නේය. තවද ඔවුන් ජලය ඉල්ලන්නේ නම් ඔවුනට උණුකළ ඊයම් වැනි ජලය දෙනු ලබන්නේය. එය ඔවුන්ගේ මුහුණු දවාලයි. එම පානය කෙතරම් භයානකද! තවද නවාතැනක් (ලෙස එම ගින්න) කෙතරම් නපුරුද!

إِنَّ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ إِنَّا لَا نُضِيعُ أَجْرَ مَنْ أَحْسَنَ عَمَلًا ﴿٣١﴾

31. සැබැවින්ම විශ්වාස කර යහපත් ක්‍රියාවන් කරන අය ගත්කල නියතවශයෙන්ම අපි යහපත් ක්‍රියාවන් කරන්නන්ගේ තිළිණය නිශ්ඵල නොකරන්නෙමු.

أُولَٰئِكَ لَهُمْ جَنَّاتُ عَدْنٍ تَجْرِي مِن تَحْتِهِمُ الْأَنْهَارُ يُحَلَّوْنَ فِيهَا مِنْ أَسَاوِرَ مِن ذَهَبٍ وَيَلْبَسُونَ ثِيَابًا خُضْرًا مِّن سُندُسٍ وَإِسْتَبْرَقٍ مُّتَّكِئِينَ فِيهَا عَلَى الْأَرَائِكِ ۚ نِعْمَ الثَّوَابُ وَحَسُنَتْ مُرْتَفَقًا ﴿٣٢﴾

32. මෙවන් අයට සදාකාලික වූ උද්‍යානයන් ලැබෙනු ඇත. ඒවා යටින් දිය දහරාවන් ගලා බසින්නේය. ඔවුන් එහි රන් වළලුවලින් සරසනු ලබන්නෝය. තවද ඔවුහු සියුම්ව ගෙත්තම් කළ සේද හා රළු සේද සහිත කොළ පැහැති වස්ත්‍රයන් අඳින්නෝය. එහි උසස් සෝපාවන්හි ඔවුහු හාන්සි වී සිටින්නෝය. කෙතරම් යහපත් තිළිණයක්ද! තවද කෙතරම් විශිෂ්ඨ නවාතැනක්ද!

وَاضْرِبْ لَهُم مَّثَلًا رَّجُلَيْنِ جَعَلْنَا لِأَحَدِهِمَا جَنَّتَيْنِ مِنْ أَعْنَابٍ وَحَفَفْنَاهُمَا بِنَخْلٍ وَجَعَلْنَا بَيْنَهُمَا زَرْعًا ﴿٣٣﴾

33. තවද මිනිසුන් දෙදෙනෙකුගේ උපමාව ඔවුන් වෙත ගෙන හැර දක්වන්න. ඔවුන්ගෙන් එක්කෙනෙකුට අපි මිදිවතු දෙකක් ලබාදී ඒ වටා රට ඉඳි ගස් ඇති කළෙමු. තවද ඒ දෙක අතර අපි ඉරිඟු කෙත් ඇති කළෙමු.

كِلْتَا الْجَنَّتَيْنِ آتَتْ أُكُلَهَا وَلَمْ تَظْلِم مِّنْهُ شَيْئًا ۚ وَفَجَّرْنَا خِلَالَهُمَا نَهَرًا ﴿٣٤﴾

34. එම උයන් දෙකම එහි ඵලදාව (බහුලව) පළදැරීය. තවද එය සුළුවෙන් හෝ අඩු නොවීය. තවද ඒ දෙක අතරින් අපි දිය දහරාවක් ගලා යෑමට සැලැස්වීමු.

وَكَانَ لَهُ ثَمَرٌ فَقَالَ لِصَاحِبِهِ وَهُوَ

35. මොහුට ඵලදාව (බහුලව) ලැබුණි. තවද මොහු තම සගයා සමග තර්ක

| | |
|---|---|
| කරමින්, 'මම ධනයෙන් සහ පිරිස් බලයෙන් ඔබට වඩා පොහොසත් වෙමි'යි (පුරසාරම් දොඩවමින්) ඔහු වෙත කීවේය. | يُحَاوِرُهٗۤ اَنَا اَكۡثَرُ مِنۡكَ مَالًا وَّاَعَزُّ نَفَرًا ﴿٣٥﴾ |
| 36. තවද මොහු තම ආත්මයට වරද කරගනිමින් මොහු තම උද්‍යානයට ඇතුල් විය. 'මෙය කිසි කලෙක විනාශ වනු ඇතැයි මම නොසිතමි'යි මොහු කීවේය. | وَدَخَلَ جَنَّتَهٗ وَهُوَ ظَالِمٌ لِّنَفۡسِهٖ‌ۚ قَالَ مَاۤ اَظُنُّ اَنۡ تَبِيۡدَ هٰذِهٖۤ اَبَدًا ۙ‏ ﴿٣٦﴾ |
| 37. 'තවද එම හෝරාව (කිසිදාත්) එළඹේ යැයි මම නොසිතමි. තවද මාගේ අධිපතියාණන් වෙත මා ආපසු කැඳවනු ලැබුවා වුවද මෙයට වඩා හොඳ වාසස්ථානයක් මම නිසැකවම ලබාගන්නෙමි'. | وَّمَاۤ اَظُنُّ السَّاعَةَ قَآٮِٕمَةً  ۙ وَّلَٮِٕنۡ رُّدِدْتُّ اِلٰى رَبِّىۡ لَاَجِدَنَّ خَيۡرًا مِّنۡهَا مُنۡقَلَبًا‏ ﴿٣٧﴾ |
| 38. මොහුගේ සගයා මොහු සමග සංවාදයේ යෙදෙමින් සිටියදී, 'දූවිලි පසිනුත් ඉන්පසුව ශුක්‍රාණු බිඳුවෙනුත් නුඹව මවා පසුව නුඹව (පරිපූර්ණ) මිනිසෙකු වශයෙන් හැඩගැන්වූ ඔහු කෙරෙහි නුඹ අවිශ්වාසිත වන්නෙහිදැ?'යි මොහුට පැවසීය. | قَالَ لَهٗ صَاحِبُهٗ وَهُوَ يُحَاوِرُهٗۤ اَكَفَرۡتَ بِالَّذِىۡ خَلَقَكَ مِنۡ تُرَابٍ ثُمَّ مِنۡ نُّطۡفَةٍ ثُمَّ سَوّٰٮكَ رَجُلًا ؕ‏ ﴿٣٨﴾ |
| 39. "නමුත් (මා ගත් කල) මාගේ අධිපතියාණන් වන්නේ අල්ලාහ්ම යැයි (මම විශ්වාස කරමි). තවද මාගේ අධිපතියාණන්ට කිසිවකු මම සමාන නොකරමි. | لّٰـكِنَّا۟ هُوَ اللّٰهُ رَبِّىۡ وَلَاۤ اُشۡرِكُ بِرَبِّىۡۤ اَحَدًا‏ ﴿٣٩﴾ |
| 40. "තවද නුඹ නුඹගේ උද්‍යානයට ඇතුළු වන විට 'අල්ලාහ් අභිමත වූ දේ (පමණක් ඉටුවේ.) අල්ලාහ්ගෙන් හැර වෙනත් බලයක් නැතැ'යි නුඹ නොකීවේ මන්ද? නුඹට වඩා අඩු තත්ත්වයක ධනයෙන් සහ දරු පරපුරෙන් මා සිටින බව නුඹට පෙනී ගියා නම්, | وَلَوۡلَاۤ اِذۡ دَخَلۡتَ جَنَّتَكَ قُلۡتَ مَا شَآءَ اللّٰهُ ۙ لَا قُوَّةَ اِلَّا بِاللّٰهِ‌ ۚ اِنۡ تَرَنِ اَنَا اَقَلَّ مِنۡكَ مَالًا وَّوَلَدًا‌ ۚ‏ ﴿٤٠﴾ |
| 41. "ඇතැම් විට නුඹගේ උයනට වඩා හොඳ දෙයක් මාගේ අධිපතියාණන් මා හට ලබා දෙන්නටද, එමෙන්ම එයට(නුඹගේ උයනට) අහසින් අකුණු පහරක් එවන්නටද පුළුවන. එමගින් | فَعَسٰى رَبِّىۡۤ اَنۡ يُّؤۡتِيَنِ خَيۡرًا مِّنۡ جَنَّتِكَ وَيُرۡسِلَ عَلَيۡهَا حُسۡبَانًا مِّنَ |

| | |
|---|---|
| එය හිස් ලිස්සන බිමක් වෙන්නටද පුළුවන. | السَّمَآءِ فَتُصۡبِحَ صَعِيدًا زَلَقًا ﴿٤١﴾ |
| 42. "නැතහොත් එහි ජලය (පොළොවට) සිඳී යනු ඇත. එමගින් ඔබට එය සොයා ගත නොහැකිවනු ඇත." | أَوۡ يُصۡبِحَ مَآؤُهَا غَوۡرًا فَلَن تَسۡتَطِيعَ لَهُۥ طَلَبًا ﴿٤٢﴾ |
| 43. තවද (ඇත්තෙන්ම) ඔහුගේ ඵලදාව විනාශ කරනු ලැබීය. තවද එය(උයන) එහි පන්දලම් සමග පසින් වැසුණේය. ඔහු එය සඳහා වැය කළ හේතුවෙන් ඔහු තම දෑත් මිරිකන්නට පටන්ගත්තේය. තවද ඔහු 'අහෝ! මා අධිපතියාණන් සමග මා කිසිවෙකුව සමාන නොකර සිටියා නම්' යැයි පැවසීය. | وَأُحِيطَ بِثَمَرِهِۦ فَأَصۡبَحَ يُقَلِّبُ كَفَّيۡهِ عَلَىٰ مَآ أَنفَقَ فِيهَا وَهِيَ خَاوِيَةٌ عَلَىٰ عُرُوشِهَا وَيَقُولُ يَٰلَيۡتَنِي لَمۡ أُشۡرِكۡ بِرَبِّيٓ أَحَدًا ﴿٤٣﴾ |
| 44. තවද ඔහුට පිහිට වීමට අල්ලාහ් හැර කිසිදු පිරිසක් නොවීය. තවද ඔහුට තමාව ආරක්ෂා කර ගැනීමටද නොහැකි විය. | وَلَمۡ تَكُن لَّهُۥ فِئَةٞ يَنصُرُونَهُۥ مِن دُونِ ٱللَّهِ وَمَا كَانَ مُنتَصِرًا ﴿٤٤﴾ |
| 45. එවන් අවස්ථාවෙහි උපකාරය පැමිණෙන්නේ සත්‍යයා වූ අල්ලාහ් වෙතින් පමණි. ඔහු තිළිණය ලබා දීමෙහි ශ්‍රේෂ්ඨයාය. තවද අවසන් ප්‍රතිඵලය දීමෙහිද ශ්‍රේෂ්ඨයාය. | هُنَالِكَ ٱلۡوَلَٰيَةُ لِلَّهِ ٱلۡحَقِّۚ هُوَ خَيۡرٞ ثَوَابٗا وَخَيۡرٌ عُقۡبٗا ﴿٤٥﴾ |
| 46. තවද මෙලොව ජීවිතයේ උපමාව ඔවුනට ගෙන හැර දක්වන්න. එය අප අහසින් පහළ කළ ජලයට සමානය. තවද පොළොවේ ඇති වැවිලි සමග එය මිශ්‍ර විය. අනතුරුව එය සුළං ගසාගෙන යන කැබැලිවලට කැඩුන වියළි තණ කොළ බවට පත්විය. තවද සෑම දෙයක් කෙරෙහිම අල්ලාහ්ට බලය ඇත. | وَٱضۡرِبۡ لَهُم مَّثَلَ ٱلۡحَيَوٰةِ ٱلدُّنۡيَا كَمَآءٍ أَنزَلۡنَٰهُ مِنَ ٱلسَّمَآءِ فَٱخۡتَلَطَ بِهِۦ نَبَاتُ ٱلۡأَرۡضِ فَأَصۡبَحَ هَشِيمٗا تَذۡرُوهُ ٱلرِّيَٰحُۗ وَكَانَ ٱللَّهُ عَلَىٰ كُلِّ شَيۡءٖ مُّقۡتَدِرًا ﴿٤٦﴾ |
| 47. වස්තූන් සහ දරුවන් මෙලොව ජීවිතයේ අලංකාරය වේ. එහෙත් | ٱلۡمَالُ وَٱلۡبَنُونَ زِينَةُ ٱلۡحَيَوٰةِ ٱلدُّنۡيَاۖ |

وَالْبٰقِيٰتُ الصّٰلِحٰتُ خَيْرٌ عِنْدَ رَبِّكَ ثَوَابًا وَّخَيْرٌ اَمَلًا ﴿٤٧﴾

සදාකල් පවතින යහපත් ක්‍රියාවන් ඔබ අධිපතියාණන් වෙත (විගසින්) තිළිණය ලබා දීමෙහි වඩාත් යහපත් මෙන්ම (අනාගත) බලාපොරොත්තුව සම්බන්ධයෙන්ද වඩාත් යහපත්ය.

وَيَوْمَ نُسَيِّرُ الْجِبَالَ وَتَرَى الْاَرْضَ بَارِزَةً ۙ وَّحَشَرْنٰهُمْ فَلَمْ نُغَادِرْ مِنْهُمْ اَحَدًا ﴿٤٨﴾

48. තවද අප කඳු ඉවත් කරන දිනය (ගැන සිහිපත් කරන්න). තවද පොළොව (එහි සියළු ජනසමූහයන් එකිනෙකාට එරෙහිව) ඉදිරියට එනු ඔබ දකින්නෙහිය. තවද අපි ඔවුන්ව එක්රැස් කරන්නෙමු. තවද ඔවුන්ගෙන් කිසිවෙකුවත් අපි අත් නොහරින්නෙමු.

وَعُرِضُوْا عَلٰى رَبِّكَ صَفًّا ؕ لَقَدْ جِئْتُمُوْنَا كَمَا خَلَقْنٰكُمْ اَوَّلَ مَرَّةٍ ۢ بَلْ زَعَمْتُمْ اَلَّنْ نَّجْعَلَ لَكُمْ مَّوْعِدًا ﴿٤٩﴾

49. තවද ඔබගේ අධිපතියාණන් වෙත ඔවුන්ව පෙළගස්වා ඉදිරිපත් කරනු ලබන්නෝය. (තවද ඔවුනට) 'පළමුවතාවට අප නුඹලාව මැවූ ආකාරයට නුඹලා දැන් අප වෙත පැමිණ ඇත්තෙහුය. නමුත් අප නුඹලාට අපගේ පොරොන්දුව ඉටු වීම සඳහා වේලාවක් අප නියම නොකරන්නේ යැයි නුඹලා සිතුවෙහුයැ'(යි කියනු ලැබේ).

وَوُضِعَ الْكِتٰبُ فَتَرَى الْمُجْرِمِيْنَ مُشْفِقِيْنَ مِمَّا فِيْهِ وَيَقُوْلُوْنَ يٰوَيْلَتَنَا مَالِ هٰذَا الْكِتٰبِ لَا يُغَادِرُ صَغِيْرَةً وَّلَا كَبِيْرَةً اِلَّاۤ اَحْصٰىهَا ۚ وَوَجَدُوْا مَا عَمِلُوْا حَاضِرًا ؕ وَلَا يَظْلِمُ رَبُّكَ اَحَدًا ﴿٥٠﴾

50. තවද (ඔවුන්ගේ ක්‍රියාවේ වාර්තා) පොත (ඔවුන් හමුවෙහි) තබනු ලබන්නේය. එවිට වරදකරුවන් එහි ඇති දේ පිළිබඳව බියට පත්වනු ඔබ දකින්නෙහිය. තවද ඔවුහු 'අහෝ අපට වූ විපත! මෙය කුමන වර්ගයේ (වාර්තා) පොතක්ද! මෙය කුඩා හෝ ලොකු කිසිවක් සටහන් කර ඇති මිස අත්හැර නැතැ'යි කියන්නෝය. තවද ඔවුන් කළ සෑම දෙයක්ම (ඔවුන්ගේ) අභිමුඛ ඔවුහු දකින්නෝය. තවද ඔබගේ අධිපතියාණන් කිසිවෙකුට වරද නොකරයි.

وَاِذْ قُلْنَا لِلْمَلٰۤئِكَةِ اسْجُدُوْا لِاٰدَمَ فَسَجَدُوْۤا اِلَّاۤ اِبْلِيْسَ ؕ كَانَ مِنَ الْجِنِّ فَفَسَقَ عَنْ اَمْرِ رَبِّهٖ ؕ اَفَتَتَّخِذُوْنَهٗ

51. තවද 'ආදම්ට අවනත වනු'යි අප සුරදූතයින්ට කියූ කල්හි (එම අවස්ථාව සිහිපත් කරන්න). එවිට ඔවුහු (සියල්ලෝම) අවනත වූහ, ඉබ්ලීස් හැර. ඔහු ජින්ගෙන් (කෙනෙක්) විය. එහෙයින් ඔහු තම අධිපතියාණන්ගේ අණට අවනත

وَذُرِّيَّتَهٗۤ اَوْلِيَآءَ مِنْ دُوْنِيْ وَهُمْ لَكُمْ عَدُوٌّ ؕ بِئْسَ لِلظّٰلِمِيْنَ بَدَلًا ﴿٥١﴾

නොවීය. එසේනම් මා වෙනුවට නුඹලා ඔහුවත් ඔහුගේ දරු පරම්පරාවත් ඔවුන් නුඹලාගේ සතුරන්ව සිටියදී මිතුරන් ලෙස ගන්නෙහුද? වරදකරුවන්ගේ විපාකය ඉතා නපුරුය.

مَاۤ اَشْهَدْتُّهُمْ خَلْقَ السَّمٰوٰتِ وَالْاَرْضِ وَلَا خَلْقَ اَنْفُسِهِمْ ۪ وَمَا كُنْتُ مُتَّخِذَ الْمُضِلِّيْنَ عَضُدًا ﴿٥٢﴾

52. අහස් සහ පොළොව මැව්මේදීද ඔවුන්ව මැව්මේදීද මම ඔවුන්ව සාක්ෂි වශයෙන් නොකළෙමි. තවද (මිනිසුන්ව) නොමග යවන අයව උදව්කරුවන් වශයෙන් මම නොගනිමි.

وَيَوْمَ يَقُوْلُ نَادُوْا شُرَكَآءِيَ الَّذِيْنَ زَعَمْتُمْ فَدَعَوْهُمْ فَلَمْ يَسْتَجِيْبُوْا لَهُمْ وَجَعَلْنَا بَيْنَهُمْ مَّوْبِقًا ﴿٥٣﴾

53. තවද ඔහු, 'මාගේ හවුල්කරුවන් ලෙස නුඹලා අදහස් කළ අයව කැඳවනු'යි පවසන එම දිනය (සිහිපත් කරන්න). එවිට ඔවුහු ඒ අයව කැඳවන්නෙහුය. එහෙත් ඒ අය ඔවුනට පිළිතුරු නොදෙන්නෝය. තවද අපි ඔවුනතර බාධකයක් ඇති කරන්නෙමු.

وَرَاَ الْمُجْرِمُوْنَ النَّارَ فَظَنُّوْۤا اَنَّهُمْ مُّوَاقِعُوْهَا وَلَمْ يَجِدُوْا عَنْهَا مَصْرِفًا ﴿٥٤﴾ ع

54. තවද වරදකරුවෝ ගින්න දකින්නෝය. තවද ඔවුන් එහි වැටෙන්නට යන බව වටහාගන්නෝය. තවද එයින් ගැලවීමේ මගක් ඔවුන් නොදකින්නෝය.

وَلَقَدْ صَرَّفْنَا فِيْ هٰذَا الْقُرْاٰنِ لِلنَّاسِ مِنْ كُلِّ مَثَلٍ ؕ وَكَانَ الْاِنْسَانُ اَكْثَرَ شَيْءٍ جَدَلًا ﴿٥٥﴾

55. තවද නියතවශයෙන්ම මිනිස් වර්ගයාගේ (යහපත උදෙසා) සියලු (වර්ගයේ) උපමාවන් විවිධාකාරව මෙම කුර්ආනයෙහි අපි පහදා දී ඇත්තෙමු. එහෙත් සියලු දෙයෙහි මිනිසා වඩාත්ම විවාදශීලිය.

وَمَا مَنَعَ النَّاسَ اَنْ يُّؤْمِنُوْۤا اِذْ جَآءَهُمُ الْهُدٰى وَيَسْتَغْفِرُوْا رَبَّهُمْ اِلَّاۤ اَنْ تَاْتِيَهُمْ سُنَّةُ الْاَوَّلِيْنَ اَوْ يَاْتِيَهُمُ الْعَذَابُ قُبُلًا ﴿٥٦﴾

56. තවද මිනිසුන්ව, ඔවුන් වෙත මග පෙන්වීම පැමිණි විට ඔවුන් විශ්වාස කිරීමෙන්ද, ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් සමාව ඉල්ලීමෙන්ද වැළැක්වූයේ (විපත්තිය අත්වූ) පෙර ජනතාවගේ මාර්ගය ඔවුන් අනුගමනය කිරීම හෝ (අල්ලාහ්ගේ) දඬුවම ඔවුන් අභිමුඛ බලපොරොත්තු වීම හෝ මිස නැත.

وَمَا نُرْسِلُ الْمُرْسَلِيْنَ اِلَّا مُبَشِّرِيْنَ وَمُنْذِرِيْنَ ۚ وَيُجَادِلُ الَّذِيْنَ كَفَرُوْا بِالْبَاطِلِ لِيُدْحِضُوْا بِهِ الْحَقَّ وَاتَّخَذُوْٓا اٰيٰتِيْ وَمَآ اُنْذِرُوْا هُزُوًا ﴿٥٧﴾

57. තවද, ශුභාරංචි ගෙනඑන්නන් හා අවවාද කරන්නන් මිස අපි දූතයින්ව නොඑවන්නෙමු. තවද, අවිශ්වාස කරන අය මුසාවාදය මගින් සත්‍යය අසත්‍යය බවට ඔප්පු කිරීම සඳහා තර්ක කරති. තවද, ඔවුහු මාගේ සළකුණුද, ඔවුන් වෙත අවවාද කරනලද දේද සරදමක් ලෙස (පමණක්) සලකති.

وَمَنْ اَظْلَمُ مِمَّنْ ذُكِّرَ بِاٰيٰتِ رَبِّهٖ فَاَعْرَضَ عَنْهَا وَنَسِيَ مَا قَدَّمَتْ يَدٰهُ ۗ اِنَّا جَعَلْنَا عَلٰى قُلُوْبِهِمْ اَكِنَّةً اَنْ يَّفْقَهُوْهُ وَفِيْٓ اٰذَانِهِمْ وَقْرًا ۗ وَاِنْ تَدْعُهُمْ اِلَى الْهُدٰى فَلَنْ يَّهْتَدُوْٓا اِذًا اَبَدًا ﴿٥٨﴾

58. තවද, සිය අධිපතියාණන්ගේ සළකුණු සිහිපත් කරනු ලැබ එහෙත් ඒවායින් ඉවත හැර එමෙන්ම තම අත් පෙර යවා ඇති දේ අමතක කරන අයට වඩා අඳමිටු වන්නේ අන් කවරෙක්ද? සැබැවින්ම ඔවුන් එය වටහාගත නොහැකි ආකාරයට අපි ඔවුන්ගේ හදවත් මත තිරයන්ද, ඔවුන්ගේ කන්හි බිහිරි බවද ඇති කළෙමු. තවද, ඔබ ඔවුන්ව මග පෙන්වීම වෙත කැඳවුවද, ඔවුහු එය කිසිවිටෙක නොපිළිගන්නෝය.

وَرَبُّكَ الْغَفُوْرُ ذُو الرَّحْمَةِ ۗ لَوْ يُؤَاخِذُهُمْ بِمَا كَسَبُوْا لَعَجَّلَ لَهُمُ الْعَذَابَ ۗ بَلْ لَّهُمْ مَّوْعِدٌ لَّنْ يَّجِدُوْا مِنْ دُوْنِهٖ مَوْىِٕلًا ﴿٥٩﴾

59. තවද, ඔබ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, කරුණාවෙන් පිරී ඇත්තාය. ඔවුන් උපයාගත් දේ සඳහා ඔහු ඔවුන්ව හසු කරගන්නේ නම් එවිට නියතවශයෙන්ම ඔවුන් සඳහා දඬුවම කඩිනම් කරන්නට ඔහුට තිබුණි. එහෙත් ඔවුනට නියමිත කාලයක් ඇත. ඔවුහු එයින් කිසිදු පිළිසරණක් නොදකින්නෝය.

وَتِلْكَ الْقُرٰٓى اَهْلَكْنٰهُمْ لَمَّا ظَلَمُوْا وَجَعَلْنَا لِمَهْلِكِهِمْ مَّوْعِدًا ﴿٦٠﴾ ع

60. තවද, මේ නගරයන්, (ඒවායෙහි) ඔවුන් අසාධාරණකම් කළවිට අපි ඔවුන්ව විනාශයට පත් කළෙමු. තවද, ඔවුන්ගේ විනාශය සඳහා අපි නියමිත කාලයක්ද නියම කළෙමු.

وَاِذْ قَالَ مُوْسٰى لِفَتٰىهُ لَآ اَبْرَحُ حَتّٰٓى

61. තවද, මූසා සිය තරුණ (සගයා) වෙත 'සයුරු දෙකෙහි

اَبۡلُغَ مَجۡمَعَ الۡبَحۡرَيۡنِ اَوۡ اَمۡضِىَ حُقُبًا ﴿٦١﴾

*සන්ධිස්ථානයට මා ලඟාවන තෙක් මම නොනවතින්නෙමි. නැතහොත් මම යුග ගණනාවක් ගමනෙහි යෙදෙන්නෙමි'යි පැවසූ (අවස්ථාව සිහිපත් කරන්න).

فَلَمَّا بَلَغَا مَجۡمَعَ بَيۡنِهِمَا نَسِيَا حُوۡتَهُمَا فَاتَّخَذَ سَبِيۡلَهٗ فِى الۡبَحۡرِ سَرَبًا ﴿٦٢﴾

62. එහෙත් ඒ(සයුරු)දෙකෙහි සන්ධිස්ථානයට ඔවුන් පැමිණි කල්හි ඔවුනට ඔවුන්ගේ මාළුවා අමතක විය. තවද, ඌ ඉක්මණින් මුහුදෙහි (යෑමට) තම මග පාදා ගත්තේය.

فَلَمَّا جَاوَزَا قَالَ لِفَتٰٮهُ اٰتِنَا غَدَآءَنَا لَقَدۡ لَقِيۡنَا مِنۡ سَفَرِنَا هٰذَا نَصَبًا ﴿٦٣﴾

63. තවද, ඔවුන් දෙදෙනා තවත් ඉදිරියට ගිය විට ඔහු තම තරුණ (සගයා) වෙත 'අපගේ උදේ ආහාරය ගෙන එන්න. නියතවශයෙන්ම අපගේ මෙම ගමන හේතුවෙන් අපි මහත් සේ විඩාවට පත්ව ඇත්තෙමු'යි කීවේය.

قَالَ اَرَءَيۡتَ اِذۡ اَوَيۡنَاۤ اِلَى الصَّخۡرَةِ فَاِنِّىۡ نَسِيۡتُ الۡحُوۡتَ وَمَاۤ اَنۡسٰنِيۡهُ اِلَّا الشَّيۡطٰنُ اَنۡ اَذۡكُرَهٗ‌ ۚ وَاتَّخَذَ سَبِيۡلَهٗ فِى الۡبَحۡرِ ‌ۖ عَجَبًا ﴿٦٤﴾

64. ඔහු, 'ඔබ දුටුවෙහිද? විවේකය සඳහා අප පර්වතය වෙත ලැගුම් ගැනීමට පැමිණිවිට නියතවශයෙන්ම මට මාළුවා අමතක විය. තවද, මා ඔබට ඒ ගැන සඳහන් කිරීම මට අමතක කරවූයේ ෂෙයිතාන් හැර අන් කිසිවෙකු නොවේ. ඌ මුහුදෙහි පුදුම ආකාරයට තම මග පාදා ගත්තේයැ'යි පිළිතුරු දුන්නේය.

قَالَ ذٰلِكَ مَا كُنَّا نَبۡغِ ‌ۖ فَارۡتَدَّا عَلٰٓى اٰثَارِهِمَا قَصَصًا ۙ ﴿٦٥﴾

65. 'අපි සොයමින් සිටියේ මෙයමයැ'යි ඔහු කීවේය. පසුව ඔවුන් දෙදෙනා තමන්ගේ පා සටහන් බලමින් (ඒ) ඔස්සේ ආපසු ගියහ.

فَوَجَدَا عَبۡدًا مِّنۡ عِبَادِنَاۤ اٰتَيۡنٰهُ رَحۡمَةً مِّنۡ عِنۡدِنَا وَعَلَّمۡنٰهُ مِنۡ لَّدُنَّا عِلۡمًا ﴿٦٦﴾

*66. අනතුරුව අප වෙතින් අපගේ දයාව පිරිනැමූ අපගේ දාසයින්ගෙන් කෙනෙක් ඔවුනට හමුවිය. තවද, අපි ඔහුට අප වෙතින් ඥානයද ඉගැන්වීමු.

*සටහන. 62: වාක්‍යය 61 සහ 62 හි මෙම සිදුවීම මූසා නබි තුමාට ලැබූ අධ්‍යාත්මික දර්ශනයකි. එතුමා සමග ගමන් කළ තරුණ සහායකයා ඊසා නබි තුමාව පිළිඹිබු කරයි. සයුරු දෙකෙහි සන්ධිස්ථානය යනු මුහම්මද් (සල්) තුමාණන්ගේ යුගය හමුවන කාලයයි. එහි මාළුවා යන්නෙන් අදහස අධ්‍යාත්මික අනුශාසනාවයි. එනම් මාළුවා අමතකවීම යනු මූසා නබි තුමාගේ හා ඊසා නබි තුමාගේ ජන සමූහය නොමග ගිය බව අරුත දෙයි.

*සටහන. 66: මෙහි දාසයෙක් යන්නෙන් අදහස් කරනු ලබන්නේ මූසා නබි තුමාණන්ට තම අධ්‍යාත්මික දර්ශනයේ හමු වූ හස්රත් මුහම්මද් (සල්) තුමාණන්වය.

67. මූසා 'ඔබට උගන්වා දී ඇති මගපෙන්වීමෙන් ඔබ මාහට උගන්වනු පිණිස මා ඔබව අනුගමනය කළහැකිදැ?'යි ඔහු වෙත කීවේය.

قَالَ لَهُۥ مُوسَىٰ هَلْ أَتَّبِعُكَ عَلَىٰٓ أَن تُعَلِّمَنِ مِمَّا عُلِّمْتَ رُشْدًا ٦٧

68. ඔහු (මෙසේ) පිළිතුරු දුන්නේය. 'ඔබට මා සමග කිසිවිටෙකත් ඉවසිලිවන්තව සිටිය නොහැකිය'.

قَالَ إِنَّكَ لَن تَسْتَطِيعَ مَعِىَ صَبْرًا ٦٨

69. 'තවද ඔබ මුළුමනින්ම වටහා නොගත් දේ පිළිබඳව ඔබට ඉවසිලිවන්තව සිටිය හැක්කේ කෙසේද?'

وَكَيْفَ تَصْبِرُ عَلَىٰ مَا لَمْ تُحِطْ بِهِۦ خُبْرًا ٦٩

70. ඔහු (මූසා) 'අල්ලාහ් අභිමත වූයේ නම් ඔබ, මා ඉවසිලිවන්තබව දකිනු ඇත. තවද මා ඔබට කිසිම දෙයකින් අකීකරු නොවන්නෙමි'යි කීවේය.

قَالَ سَتَجِدُنِىٓ إِن شَآءَ ٱللَّهُ صَابِرًا وَلَآ أَعْصِى لَكَ أَمْرًا ٧٠

71. 'එසේය, ඔබ මා අනුගමනය කරන්නේ නම්, මා විසින්ම ඔබට කිසිදු දෙයක් පිළිබඳ පවසන තුරු ඒ ගැන මගෙන් ප්‍රශ්න නොකරන්නැ'යි ඔහු කීවේය.

قَالَ فَإِنِ ٱتَّبَعْتَنِى فَلَا تَسْـَٔلْنِى عَن شَىْءٍ حَتَّىٰٓ أُحْدِثَ لَكَ مِنْهُ ذِكْرًا ٧١ ع

72. පසුව ඔවුන් දෙදෙනාම පිටත් වූහ. ඔවුන් ඔරුවකට ගොඩ වූ පසු ඔහු එහි සිදුරු කළේය. 'ඔබ එය සිදුරු කළේ එහි සිටින අයව ගිල්වා දැමීමටද? නියතවශයෙන්ම ඔබ කර ඇත්තේ නපුරු දෙයක්යැ'යි ඔහු (මූසා) කීවේය.

فَٱنطَلَقَا حَتَّىٰٓ إِذَا رَكِبَا فِى ٱلسَّفِينَةِ خَرَقَهَا ۖ قَالَ أَخَرَقْتَهَا لِتُغْرِقَ أَهْلَهَا لَقَدْ جِئْتَ شَيْـًٔا إِمْرًا ٧٢

73. 'ඔබට මා සමග ඉවසිලිමත්ව සිටීමට නොහැකි බව මම (ඔබට) නොකිවේම්දැ?'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالَ أَلَمْ أَقُلْ إِنَّكَ لَن تَسْتَطِيعَ مَعِىَ صَبْرًا ٧٣

74. 'මාගේ අමතක වීම නිසා මට දොස් නොපවරන්න. තවද මාගේ මෙම(අතපසුවීම) ගැන මා කෙරෙහි දැඩි නොවන්නැ'යි ඔහු (මූසා) කීවේය.

قَالَ لَا تُؤَاخِذْنِى بِمَا نَسِيتُ وَلَا تُرْهِقْنِى مِنْ أَمْرِى عُسْرًا ٧٤

فَانۡطَلَقَا ٚ حَتّٰٓى اِذَا لَقِيَا غُلٰمًا فَقَتَلَهٗ ۙ قَالَ اَقَتَلۡتَ نَفۡسًا زَكِيَّةًۢ بِغَيۡرِ نَفۡسٍ ؕ لَقَدۡ جِئۡتَ شَيۡـًٔـا نُّكۡرًا ﴿٧٥﴾

*75. අනතුරුව ඔවුන් දෙදෙනා ගමනෙහි යෙදුණහ. පසුව ඔවුන්ට පිරිමි ළමයෙකුව මුණ ගැසුණ විට ඔහු හෙතෙමව ඝාතනය කළේය. 'ඔබ අහිංසක කෙනෙකුව (හෙතෙම) කිසිවෙකුව (ඝාතනය කර) නොමැතිව තිබියදී ඝාතනය කළෙහිද? නියතවශයෙන්ම ඔබ කර ඇත්තේ මහත් පිළිකුල් දෙයක්යැ!'යි (මූසා) කීවේය.

16-කොටස

قَالَ اَلَمۡ اَقُلۡ لَّكَ اِنَّكَ لَنۡ تَسۡتَطِيۡعَ مَعِىَ صَبۡرًا ﴿٧٦﴾

76. 'ඔබට මා සමග ඉවසිලිමත්ව සිටීමට නොහැකි බව මම ඔබට නොකීවේම්දැ?'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالَ اِنۡ سَاَلۡتُكَ عَنۡ شَىۡءٍۢ بَعۡدَهَا فَلَا تُصٰحِبۡنِىۡ ۚ قَدۡ بَلَغۡتَ مِنۡ لَّدُنِّىۡ عُذۡرًا ﴿٧٧﴾

77. 'මින් පසු මා ඔබගෙන් කිසිවක් ගැන විමසුවහොත් මාව ඔබ සමඟ තබා නොගන්න. කිම්දයත් ඔබට මාගෙන් ප්‍රමාණවත් තරම් නිදහසට කරුණු ලැබී ඇතැ'යි (මූසා) කීවේය.

فَانۡطَلَقَا ٚ حَتّٰٓى اِذَاۤ اَتَيَاۤ اَهۡلَ قَرۡيَةِ ۨاسۡتَطۡعَمَاۤ اَهۡلَهَا فَاَبَوۡا اَنۡ يُّضَيِّفُوۡهُمَا فَوَجَدَا فِيۡهَا جِدَارًا يُّرِيۡدُ اَنۡ يَّنۡقَضَّ فَاَقَامَهٗ ؕ قَالَ لَوۡ شِئۡتَ لَتَّخَذۡتَ عَلَيۡهِ اَجۡرًا ﴿٧٨﴾

78. අනතුරුව ඔවුන් දෙදෙනා ගමනෙහි යෙදුණහ. ඔවුන් එක් නගරයක ජනතාව වෙත පැමිණි විට, ඔවුහු එහි ජනතාවගෙන් ආහාර ඉල්ලූහ. නමුත් ඔවුහු ඔවුන් දෙදෙනාව (ඔවුන්ගේ) ආගන්තුකයින් ලෙස ගැනීමට ප්‍රතික්ෂේප කළහ. තවද ඔවුන් දෙදෙනා එහි කඩා වැටීමට ආසන්නව තිබූ බිත්තියක් දුටුවෝය. තවද ඔහු එය අළුත්වැඩියා කළේය. 'ඔබ කැමති වූනේ නම් ඔබට ඒ සඳහා කුලියක් ලබා ගන්නට තිබුණැ'යි (මූසා) කීවේය.

قَالَ هٰذَا فِرَاقُ بَيۡنِىۡ وَبَيۡنِكَ ۚ سَاُنَبِّئُكَ بِتَاۡوِيۡلِ مَا لَمۡ تَسۡتَطِعْ عَّلَيۡهِ صَبۡرًا ﴿٧٩﴾

79. 'මෙය මා සහ ඔබ අතර වෙන්විය යුතු (අවස්ථාවයි). ඔබට ඉවසිලිවන්තව දරාගත නොහැකිවූ දෙයෙහි අර්ථකථනය දැන් මම ඔබට කියාදෙන්නෙමි'යි ඔහු කීවේය.

*සටහන. 75: සිහිනය විග්‍රහ කිරීමේදී එහි පිරිමි ළමයෙකු යන අදහස මත් ගතිය සහ ව්‍යාජ ශක්තිය පිළිඹිබු වේ. ඔහුව ඝාතනය කිරීම යන්නෙන් අදහස් වන්නේ, නබි (සල්) තුමාණන් මත් ගතිය හා ව්‍යාජ ශක්තිය ඇති කරන්නා වූ මත්පැන් සහ සූදුව යනාදී තහනම් කළේ යන්නයි.

80. 'ඔරුව ගත්කල එය මුහුදෙහි වැඩ කළ (ඇතැම්) දිළිඳු ජනතාවකට අයත් විය. මා එය හානි කිරීමට අදහස් කළේ බලහත්කාරයෙන් සෑම ඔරුවක්ම අත්පත් කරන රජෙකු ඔවුන් පිටුපස සිටි නිසාය'.

أَمَّا السَّفِينَةُ فَكَانَتْ لِمَسَاكِينَ
يَعْمَلُونَ فِي الْبَحْرِ فَأَرَدْتُ أَنْ أَعِيبَهَا
وَكَانَ وَرَاءَهُمْ مَلِكٌ يَأْخُذُ كُلَّ سَفِينَةٍ
غَصْبًا ﴿٨٠﴾

81. 'තවද තරුණයා ගත්කල ඔහුගේ දෙමාපියන් විශ්වාසිතයින්ව සිටියහ. ඔහු කලහකාරී වෙමින් හා අවිශ්වාසිත වෙමින් ඔවුනට හිරිහැරයක් කරනු ඇතැයි අපි බිය වූයෙමු'.

وَأَمَّا الْغُلَامُ فَكَانَ أَبَوَاهُ مُؤْمِنَيْنِ فَخَشِينَا
أَنْ يُرْهِقَهُمَا طُغْيَانًا وَكُفْرًا ﴿٨١﴾

82. 'එබැවින් ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන් දෙදෙනාට ඔහුට වඩා නිර්මලත්වයෙන්ද (වඩාත්) සෙනෙහසින් සමීපවන්තද (දරුවෙකු) ඔහු වෙනුවට දිය යුතු යැයි අපි කැමති වූයෙමු'.

فَأَرَدْنَا أَنْ يُبْدِلَهُمَا رَبُّهُمَا خَيْرًا مِنْهُ
زَكَاةً وَأَقْرَبَ رُحْمًا ﴿٨٢﴾

83. 'තවද බිත්තිය ගත්කල එය නගරයෙහි වූ අනාථ පිරිමි ළමයින් දෙදෙනෙකුට අයත් විය. තවද එය යට ඔවුනට හිමි නිධානයක් විය. තවද ඔවුන්ගේ පියා ධාර්මිෂ්ඨකයෙක් විය. එබැවින් ඔවුන් තමන්ගේ තරුණවියට පත්විය යුතුයැයිද ඔවුන්ගේ නිධානය මතුකර ගත යුතුයැයිද ඔබ අධිපතියාණන් කැමති විය. මෙය ඔබ අධිපතියාණන්ගේ දයාවක් විය. තවද මා එය මාගේ ස්වකැමැත්ත අනුව කළේ නැත. මෙය ඔබට ඉවසිලිවන්තව දරාගත නොහැකි වූ දෙයෙහි අර්ථවිවරණය වේ'.

وَأَمَّا الْجِدَارُ فَكَانَ لِغُلَامَيْنِ يَتِيمَيْنِ فِي
الْمَدِينَةِ وَكَانَ تَحْتَهُ كَنْزٌ لَهُمَا وَكَانَ
أَبُوهُمَا صَالِحًا فَأَرَادَ رَبُّكَ أَنْ يَبْلُغَا
أَشُدَّهُمَا وَيَسْتَخْرِجَا كَنْزَهُمَا رَحْمَةً
مِنْ رَبِّكَ وَمَا فَعَلْتُهُ عَنْ أَمْرِي ذَٰلِكَ
تَأْوِيلُ مَا لَمْ تَسْطِعْ عَلَيْهِ صَبْرًا ﴿٨٣﴾

84. තවද zසුල්කර්නයින් පිළිබඳව ඔවුහු ඔබගෙන් විමසති. 'ඔහුගේ වෘත්තාන්තයෙන් (සමහරක්) නියතවශයෙන්ම මම නුඹලාට කියා දෙන්නෙමි'යි පවසන්න.

وَيَسْأَلُونَكَ عَنْ ذِي الْقَرْنَيْنِ قُلْ
سَأَتْلُو عَلَيْكُمْ مِنْهُ ذِكْرًا ﴿٨٤﴾

| | |
|---|---|
| 85. නියතවශයෙන්ම අපි ඔහුව භූමියෙහි ස්ථාපිත කළෙමු. තවද අපි ඔහුට (ඉටු කිරීමට අවශ්‍ය) සෑම දෙයහි විධිවිධාන ලබා දුන්නෙමු. | اِنَّا مَكَّنَّا لَهٗ فِى الْاَرْضِ وَاٰتَيْنٰهُ مِنْ كُلِّ شَىْءٍ سَبَبًا ۙ﴿۸۵﴾ |
| 86. පසුව ඔහු (නිශ්චිත) මාර්ගයක් අනුගමනය කළේය. | فَاَتْبَعَ سَبَبًا ﴿۸۶﴾ |
| 87. අවසානයේ ඔහු හිරු බසින තැනට ළඟා වූ විට එය ගොහොරු ජලාශයක බැස යනු ඔහු දුටුවේය. තවද ඔහු එයට සමීපව ජනතාවක් දුටුවේය. 'එම්බල zසුල්කර්නයින් ඔවුනට දඬුවම් දෙන්න, නැතහොත් ඔවුනට කරුණාවෙන් සළකන්නැ'යි අපි කිවෙමු. | حَتّٰٓى اِذَا بَلَغَ مَغْرِبَ الشَّمْسِ وَجَدَهَا تَغْرُبُ فِىْ عَيْنٍ حَمِئَةٍ وَّوَجَدَ عِنْدَهَا قَوْمًا ؕ قُلْنَا يٰذَا الْقَرْنَيْنِ اِمَّاۤ اَنْ تُعَذِّبَ وَاِمَّاۤ اَنْ تَتَّخِذَ فِيْهِمْ حُسْنًا ﴿۸۷﴾ |
| 88. 'වැරදි කරන කවුරුන් හෝ වේවා අපි නියතවශයෙන්ම ඔහුට දඬුවම් දෙන්නෙමු. පසුව ඔහු සිය අධිපතියාණන් වෙත ආපසු ගෙන එනු ලබන්නේය. ඔහුට දැඩි දඬුවමක් ඔහු දෙන්නේයැ'යි ඔහු පැවසීය. | قَالَ اَمَّا مَنْ ظَلَمَ فَسَوْفَ نُعَذِّبُهٗ ثُمَّ يُرَدُّ اِلٰى رَبِّهٖ فَيُعَذِّبُهٗ عَذَابًا نُّكْرًا ﴿۸۸﴾ |
| 89. නමුත් විශ්වාස කර ධාර්මිෂ්ඨකව ක්‍රියා කරන කවුරුන් හෝ වේවා ඔහුට යහපත් තිළිණය ලැබෙන්නේය. තවද අපගේ විධානයෙන් අපි පහසුවෙන් ඔහුට කථා කරන්නෙමු. | وَاَمَّا مَنْ اٰمَنَ وَعَمِلَ صَالِحًا فَلَهٗ جَزَآءَ ۨالْحُسْنٰى ۚ وَسَنَقُوْلُ لَهٗ مِنْ اَمْرِنَا يُسْرًا ؕ﴿۸۹﴾ |
| 90. පසුව ඔහු (තවත් නිශ්චිත) මාර්ගයක් අනුගමනය කළේය. | ثُمَّ اَتْبَعَ سَبَبًا ﴿۹۰﴾ |
| 91. අවසානයේදී ඔහු හිරු උදාවන තැනට ළඟා වූ විට අප එයින් කිසිදු ආවරණයක් නොකළ ජනතාවක් මත එය උදාවනු ඔහු දුටුවේය. | حَتّٰٓى اِذَا بَلَغَ مَطْلِعَ الشَّمْسِ وَجَدَهَا تَطْلُعُ عَلٰى قَوْمٍ لَّمْ نَجْعَلْ لَّهُمْ مِّنْ دُوْنِهَا سِتْرًا ۙ﴿۹۱﴾ |
| 92. (ඇත්තෙන්ම එය) එසේම විය. සැබැවින්ම අපි අපගේ ඥානය තුළින් ඔහු වෙත වූ (සියල්ල) වටලා ගත්තෙමු. | كَذٰلِكَ ؕ وَقَدْ اَحَطْنَا بِمَا لَدَيْهِ خُبْرًا ﴿۹۲﴾ |

ثُمَّ اَتْبَعَ سَبَبًا ﴿٩٣﴾

93. පසුව ඔහු (තවත් නිශ්චිත) මාර්ගයක් අනුගමනය කළේය.

حَتّٰىٓ اِذَا بَلَغَ بَيْنَ السَّدَّيْنِ وَجَدَ مِنْ دُوْنِهِمَا قَوْمًا ۙ لَّا يَكَادُوْنَ يَفْقَهُوْنَ قَوْلًا ﴿٩٤﴾

94. අවසානයේදී ඔහු කඳු දෙක අතරට ළඟා වූ විට වදනක්වත් තේරුම් ගත නොහැකි ජනතාවක් ඒ අවට සිටිනු ඔහු දුටුවේය.

قَالُوْا يٰذَا الْقَرْنَيْنِ اِنَّ يَاْجُوْجَ وَمَاْجُوْجَ مُفْسِدُوْنَ فِى الْاَرْضِ فَهَلْ نَجْعَلُ لَكَ خَرْجًا عَلٰٓى اَنْ تَجْعَلَ بَيْنَنَا وَبَيْنَهُمْ سَدًّا ﴿٩٥﴾

95. 'එම්බල zසුල්කර්නයින් ඇත්තෙන්ම යඃජූජ් සහ මඃජූජ් භූමියෙහි ආරවුල් ඇති කරන්නෝය. එසේනම් ඔබ අප හා ඔවුන් අතර (ආරක්ෂක) බාධකයක් ඇති කිරීමේ කොන්දේසිය පිට අප ඔබට කුලියක් දෙන්නදෑ?'යි ඔවුහු කීහ.

قَالَ مَا مَكَّنِّيْ فِيْهِ رَبِّيْ خَيْرٌ فَاَعِيْنُوْنِيْ بِقُوَّةٍ اَجْعَلْ بَيْنَكُمْ وَبَيْنَهُمْ رَدْمًا ۙ ﴿٩٦﴾

96. 'මේ සම්බන්ධව මා අධිපතියාණන් මා වෙත ලබාදී ඇති බලය වඩාත් යහපත්ය. නමුත් නුඹලා ශ්‍රම ශක්තියෙන් මාහට උදව් වනු. මම නුඹලා සහ ඔවුන් අතර (ආරක්ෂක) පවුරක් ඇති කරන්නෙමි'යි ඔහු පිළිතුරු දුන්නේය.

اٰتُوْنِيْ زُبَرَ الْحَدِيْدِ ؕ حَتّٰىٓ اِذَا سَاوٰى بَيْنَ الصَّدَفَيْنِ قَالَ انْفُخُوْا ؕ حَتّٰىٓ اِذَا جَعَلَهٗ نَارًا ۙ قَالَ اٰتُوْنِيْٓ اُفْرِغْ عَلَيْهِ قِطْرًا ؕ ﴿٩٧﴾

97. 'යකඩ කුට්ටි මා වෙත ගෙනෙනු'. (ඔවුහු එසේ කළහ) එතෙක් ඔහු කඳු පෙදෙස් දෙක අතර වූ ඉඩ අවකාශය (පුරවා) සමතලා කළ විට ඔහු '(දැන් නුඹලාගේ මයිනහම් මගින්) පිඹිනු'යි කීවේය. එවිට ඔහු එය ගිනියම් කරන තුරු (ඔවුහු පිඹූහ). 'මා ඒ මත වත්කරනු පිණිස මා වෙත උණු කළ තඹ ගෙනෙනු'යි ඔහු කීවේය.

فَمَا اسْطَاعُوْٓا اَنْ يَّظْهَرُوْهُ وَمَا اسْتَطَاعُوْا لَهٗ نَقْبًا ﴿٩٨﴾

98. එබැවින් (යඃජූජ් සහ මඃජූජ් වන) ඔවුනට ඒ මත නැගී යෑමට නොහැකි විය. තවද ඔවුනට එය තුළින් හාරාගෙන යෑමටද නොහැකි විය.

99. (එවිට) ඔහු, 'මෙය මාගේ අධිපතියාණන්ගෙන් වන දයාවකි. නමුත් මාගේ අධිපතියාණන්ගේ පොරොන්දුව ඉටුවන විට ඔහු එය කැබැලි වලට කඩා දමනු ඇත. තවද මාගේ අධිපතියාණන්ගේ පොරොන්දුව (සහතික ලෙස) සත්‍ය වේයැ'යි කීවේය.

قَالَ هٰذَا رَحْمَةٌ مِّنْ رَّبِّيْ ۚ فَإِذَا جَآءَ وَعْدُ رَبِّيْ جَعَلَهٗ دَكَّآءَ ۚ وَكَانَ وَعْدُ رَبِّيْ حَقًّا ﴿٩٩﴾

100. තවද එදින අපි ඔවුන්ගෙන් සමහරෙක්ව සමහරුන්ට එරෙහිව රළ මෙන් ගැටීමට හරින්නෙමු. තවද සූර් (නළාව) පිඹිනු ලබන්නේය. එවිට අපි ඔවුන් සියල්ල එක්රැස් කරන්නෙමු.

وَتَرَكْنَا بَعْضَهُمْ يَوْمَئِذٍ يَّمُوْجُ فِيْ بَعْضٍ وَّ نُفِخَ فِي الصُّوْرِ فَجَمَعْنٰهُمْ جَمْعًا ﴿١٠٠﴾

101. එදින අවිශ්වාසීතයින් හට අපි නිරය මුහුණට මුහුණලා ගෙනහැර පාන්නෙමු.

وَّعَرَضْنَا جَهَنَّمَ يَوْمَئِذٍ لِّلْكٰفِرِيْنَ عَرْضًا ﴿١٠١﴾

102. එවන් අයගේ නෙත් මාගේ අනුශාසනාවෙන් (එිල නොලබා) මුවාවී තිබුණි. තවද ඔවුනට ශ්‍රවණය කරන්නටද නොහැකි විය.

الَّذِيْنَ كَانَتْ اَعْيُنُهُمْ فِيْ غِطَآءٍ عَنْ ذِكْرِيْ وَكَانُوْا لَا يَسْتَطِيْعُوْنَ سَمْعًا ﴿١٠٢﴾

103. මා වෙනුවට මාගේ දාසයින්ව ආරක්ෂකයන් ලෙස ගත හැකි යැයි අවිශ්වාසිතයින් සිතන්නේද? නියතවශයෙන්ම අපි අවිශ්වාසිතයින් හට ආගන්තුක සත්කාරයක් ලෙස නිරය සලසා ඇත්තෙමු.

اَفَحَسِبَ الَّذِيْنَ كَفَرُوْٓا اَنْ يَّتَّخِذُوْا عِبَادِيْ مِنْ دُوْنِيْٓ اَوْلِيَآءَ ۭ اِنَّآ اَعْتَدْنَا جَهَنَّمَ لِلْكٰفِرِيْنَ نُزُلًا ﴿١٠٣﴾

104. පවසන්න, 'ක්‍රියාවන් හේතුවෙන් අන්ත පරාජිතයින් කවුරුන් දැයි අප නුඹලාට කියා දෙන්නද?'.

قُلْ هَلْ نُنَبِّئُكُمْ بِالْاَخْسَرِيْنَ اَعْمَالًا ﴿١٠٤﴾

105. එවන් අයගේ (සියළු) උත්සාහයන් මෙලෝ ජීවිතය (සොයා යැමෙහි මුළුමනින්ම) අපතේ ගියේය. තවද ඔවුහු යහපත් ක්‍රියාවන් කරන්නන් යැයි සිතති.

اَلَّذِيْنَ ضَلَّ سَعْيُهُمْ فِي الْحَيٰوةِ الدُّنْيَا وَهُمْ يَحْسَبُوْنَ اَنَّهُمْ يُحْسِنُوْنَ صُنْعًا ﴿١٠٥﴾

أُولَٰٓئِكَ الَّذِينَ كَفَرُوا بِاٰيٰتِ رَبِّهِمْ وَلِقَآئِهٖ فَحَبِطَتْ اَعْمَالُهُمْ فَلَا نُقِيمُ لَهُمْ يَوْمَ الْقِيٰمَةِ وَزْنًا ﴿١٠٦﴾

106. සිය අධිපතියාණන්ගේ සළකුණු කෙරෙහිද ඔහුව හමුවීම කෙරෙහිද අවිශ්වාස කරන අය ඔවුහුම වෙති. එබැවින් ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල වේ. තවද පුනරුත්ථාන දිනයේදී අපි ඔවුන්ට කිසිදු වැදගත්කමක් නොදෙන්නෙමු.

ذٰلِكَ جَزَآؤُهُمْ جَهَنَّمُ بِمَا كَفَرُوا وَاتَّخَذُوٓا اٰيٰتِيْ وَرُسُلِيْ هُزُوًا ﴿١٠٧﴾

107. ඔවුන් අවිශ්වාස කර මාගේ සළකුණු සහ මාගේ දූතයින්ට සරදම් කළ නිසා නිරයම ඔවුන්ගේ ඵලවිපාකය වේ.

اِنَّ الَّذِينَ اٰمَنُوا وَعَمِلُوا الصّٰلِحٰتِ كَانَتْ لَهُمْ جَنّٰتُ الْفِرْدَوْسِ نُزُلًا ﴿١٠٨﴾

108. නියතවශයෙන්ම විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන්නන්ට ආගන්තුක සත්කාර ස්ථානයක් ලෙස ස්වර්ගයේ උද්‍යයානයන් ලැබෙනු ඇත.

خٰلِدِينَ فِيهَا لَا يَبْغُونَ عَنْهَا حِوَلًا ﴿١٠٩﴾

109. ඔවුහු එහිම වාසය කරන්නන්ය. ඔවුහු එයින් හැර යෑමක් නොපතන්නෝය.

قُلْ لَّوْ كَانَ الْبَحْرُ مِدَادًا لِّكَلِمٰتِ رَبِّيْ لَنَفِدَ الْبَحْرُ قَبْلَ اَنْ تَنْفَدَ كَلِمٰتُ رَبِّيْ وَلَوْ جِئْنَا بِمِثْلِهٖ مَدَدًا ﴿١١٠﴾

110. පවසන්න, 'මා අධිපතියාණන්ගේ වදන් සඳහා සාගරය තින්ත බවට පත්වුවද මා අධිපතියාණන්ගේ වදන් අවසන් වීමට පෙර නියතවශයෙන්ම එම සාගරය මුළුමනින්ම සිඳී යනු ඇත. උදව් සඳහා අප (තවත්) එවැන්නක් (සාගරයක්) ගෙන ආවත් (එයද සිඳී යනු ඇත)'.

قُلْ اِنَّمَآ اَنَا بَشَرٌ مِّثْلُكُمْ يُوحٰٓى اِلَيَّ اَنَّمَآ اِلٰهُكُمْ اِلٰهٌ وَّاحِدٌ فَمَنْ كَانَ يَرْجُوا لِقَآءَ رَبِّهٖ فَلْيَعْمَلْ عَمَلًا صَالِحًا وَّلَا يُشْرِكْ بِعِبَادَةِ رَبِّهٖٓ اَحَدًا ﴿١١١﴾

111. පවසන්න, 'මමද නුඹලා වැනි මිනිසෙක් පමණක් වෙමි. (එහෙත්) නුඹලාගේ නැමදීමට සුදුසු දෙවියන් එකම දෙවියන් බව මාවෙත අනාවරණය කරනු ලැබ ඇත. එබැවින් සිය අධිපතියාණන්ව හමුවීමට බලාපොරොත්තු වන්නා යහපත් ක්‍රියාවන් කළ යුතුය. තවද සිය අධිපතියාණන්ව නැමදීමෙහිදී ඔහු අන් කිසිවෙකුව සමාන නොතැබිය යුතුය.'



මර්යම්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

2. කාෆ් හා යා අයින් සාද්.◆

كٓهٰيٰعٓصٓ ۝٢

3. (මෙය) ඔබගේ අධිපතියාණන් ඔහුගේ දාසයා වූ zසකරියියා වෙත (දක්වන ලද) දයාවෙහි විස්තරයයි.

ذِكۡرُ رَحۡمَتِ رَبِّكَ عَبۡدَهٗ زَكَرِيَّا ۝٣

4. ඔහු තම අධිපතියාණන්ව සිහින් හඬින් අඬගැසූ කල්හි.

اِذۡ نَادٰى رَبَّهٗ نِدَآءً خَفِيًّا ۝٤

5. 'මාගේ අධිපතියාණෙනි, මාගේ අස්ථි සැබැවින්ම දුර්වල වී ඇත. තවද (මාගේ) හිස මහළුවිය නිසා දිලිසේ. එහෙත් මාගේ අධිපතියාණෙනි ඔබගෙන් මා කළ යාච්ඤාවෙන් මා කිසිවිටකත් අභාග්‍යවන්ත නොවූයෙමි'යි ඔහු කීවේය.

قَالَ رَبِّ اِنِّىۡ وَهَنَ الۡعَظۡمُ مِنِّىۡ وَاشۡتَعَلَ الرَّاۡسُ شَيۡبًا وَّلَمۡ اَكُنۡۢ بِدُعَآئِكَ رَبِّ شَقِيًّا ۝٥

6. 'තවද මාගෙන් පසු මාගේ නෑදෑයින්ගෙන් මම බිය වෙමි. තවද මාගේ භාර්යාව වඳ කෙනකි. මේනිසා ඔබ වෙතින් මාහට (මාගෙන්) පැවතෙන්නෙකුව ලබාදෙනු මැනව'.

وَاِنِّىۡ خِفۡتُ الۡمَوَالِىَ مِنۡ وَّرَآءِىۡ وَكَانَتِ امۡرَاَتِىۡ عَاقِرًا فَهَبۡ لِىۡ مِنۡ لَّدُنۡكَ وَلِيًّا ۝٦

7. 'ඔහු මාගේ උරුමක්කාරයෙකු මෙන්ම යඃකූබ්ගේ නිවැසියන්ගේ උරුමක්කාරයෙකු වනු පිණිසය. තවද මාගේ අධිපතියාණෙනි, ඔහුව ඔබට ඉතා ප්‍රිය බවට පත් කරනු මැනව'.

يَّرِثُنِىۡ وَيَرِثُ مِنۡ اٰلِ يَعۡقُوۡبَ ۖ وَاجۡعَلۡهُ رَبِّ رَضِيًّا ۝٧

8. 'එම්බල zසකරියියා! අපි නුඹට පුතෙකු පිළිබඳ සුභාරංචිය

يٰزَكَرِيَّاۤ اِنَّا نُبَشِّرُكَ بِغُلٰمِ اسۡمُهٗ

◆ ඔබ සියල්ලන්ටම ප්‍රමාණවත්ය. ඔබ සත්‍ය මග පෙන්වන්නෙක්ය. ඕ! සියල්ල දත්තාණෙනි, සත්‍යවාදියාණෙනි.

يَحْيٰى ۙ لَمْ نَجْعَلْ لَّهٗ مِنْ قَبْلُ سَمِيًّا ﴿٨﴾

දෙන්නෙමු. ඔහුගේ නම යහ්යා (වන්නේ)ය. මීට පෙර මෙම නමින් කිසිවෙකුව අපි බිහි නොකළෙමු'.

قَالَ رَبِّ اَنّٰى يَكُوْنُ لِيْ غُلٰمٌ وَّكَانَتِ امْرَاَتِيْ عَاقِرًا وَّقَدْ بَلَغْتُ مِنَ الْكِبَرِ عِتِيًّا ﴿٩﴾

9. 'මාගේ අධිපතියාණෙනි, මාගේ බිරිඳ වඳය. මාද මහළු වියේ අන්තයටම පැමිණ සිටිත්දී මා පුතෙකු ලබන්නේ කෙසේදැ?'යි ඔහු කීවේය.

قَالَ كَذٰلِكَ ۚ قَالَ رَبُّكَ هُوَ عَلَيَّ هَيِّنٌ وَّقَدْ خَلَقْتُكَ مِنْ قَبْلُ وَلَمْ تَكُ شَيْـًٔا ﴿١٠﴾

10. ඔහු(සුරදූතයා) "එලෙසය. එහෙත් ඔබගේ අධිපතියාණන්, 'එය මට පහසු දෙයකි. තවද ඇත්තෙන්ම මීට කලින් ඔබ කිසිවක් නොවී සිටියදී මම ඔබව මැව්වෙමි'යි පැවසුවේයැ"යි කීවේය.

قَالَ رَبِّ اجْعَلْ لِّيْٓ اٰيَةً ؕ قَالَ اٰيَتُكَ اَلَّا تُكَلِّمَ النَّاسَ ثَلٰثَ لَيَالٍ سَوِيًّا ﴿١١﴾

11. 'මාගේ අධිපතියාණෙනි, මා හට නිමිත්තක් නියම කරනු මැනවැ'යි ඔහු කීවේය. 'ඔබ සඳහා නිමිත්ත නම් පුරා (දිවා හා) රාත්‍රීන් තුනක් ඔබ මිනිසුන් සමග කථා නොකිරීම වේ යැ'යි (අධිපතියාණන්) පැවසුවේය.

فَخَرَجَ عَلٰى قَوْمِهٖ مِنَ الْمِحْرَابِ فَاَوْحٰٓى اِلَيْهِمْ اَنْ سَبِّحُوْا بُكْرَةً وَّعَشِيًّا ﴿١٢﴾

12. පසුව ඔහු කුටියෙන් එළියටවිත් සිය ජනතාව ඉදිරියට ගොස් උදයෙහිද සවසෙහිද (දෙවියන්ව) සුවිශුද්ධ කරනුයි ඔවුනට ඉඟි කළේය.

يٰيَحْيٰى خُذِ الْكِتٰبَ بِقُوَّةٍ ؕ وَاٰتَيْنٰهُ الْحُكْمَ صَبِيًّا ۙ ﴿١٣﴾

13. 'එම්බල යහ්යා! පුස්තකය දැඩිව ග්‍රහණය කරගන්න'. තවද අපි ඔහුට බාලයෙකුව සිටියදීම ප්‍රඥාව ලබා දුන්නෙමු.

وَّحَنَانًا مِّنْ لَّدُنَّا وَزَكٰوةً ؕ وَكَانَ تَقِيًّا ۙ ﴿١٤﴾

14. තවද අප වෙතින් (හදවතෙහි) දයාවද නිර්මලත්වයද (දුනිමු). තවද ඔහු බියබැතිමතෙක් විය.

وَّبَرًّاۢ بِوَالِدَيْهِ وَلَمْ يَكُنْ جَبَّارًا عَصِيًّا ﴿١٥﴾

15. තවද සිය දෙමාපියන්ට යුතුකම් ඉටුකරන්නෙක් විය. තවද ඔහු අහංකාර (මෙන්ම) හිතුවක්කාර නොවීය.

وَسَلٰمٌ عَلَيْهِ يَوْمَ وُلِدَ وَيَوْمَ يَمُوْتُ

16. තවද ඔහු උපත ලැබූ දිනයේදීද

وَيَوْمَ يُبْعَثُ حَيًّا ⑯ ع

ඔහු මියගිය දිනයේදීද ඔහු කෙරෙහි සාමය විය. තවද (නැවත) ජීවය ලබා නැගිටුවනු ලබන දිනයේදීද, (ඔහු කෙරෙහි සාමය වන්නේය).

وَاذْكُرْ فِي الْكِتٰبِ مَرْيَمَ ۘ اِذِ انْتَبَذَتْ مِنْ اَهْلِهَا مَكَانًا شَرْقِيًّا ⑰ۙ

17. තවද මර්යම් ගැන ග්‍රන්ථයෙහි (සඳහන් දේ) කියා දෙන්න. ඇය සිය ජනතාවගෙන් ඉවත්ව නැගෙනහිර දෙස ඇති තැනකට ගිය විට,

فَاتَّخَذَتْ مِنْ دُوْنِهِمْ حِجَابًا ۖ فَاَرْسَلْنَآ اِلَيْهَا رُوْحَنَا فَتَمَثَّلَ لَهَا بَشَرًا سَوِيًّا ⑱

18. තවද ඇය, තමා හා ඔවුන් අතර තිරයක් යොදා ගත්තාය. පසුව අපි අපගේ සුරදූතයාව ඇය වෙත යැව්වෙමු. තවද ඔහු ඇයට සම්පූර්ණ මිනිසෙකු ලෙස පෙනුනේය.

قَالَتْ اِنِّيْٓ اَعُوْذُ بِالرَّحْمٰنِ مِنْكَ اِنْ كُنْتَ تَقِيًّا ⑲

19. 'මම ඔබගෙන් (මිදීමට) කාරුණිකවූ (දෙවියන්)ගේ සරණ පතමි. ඔබ (ඔහු කෙරෙහි) සත්තකින්ම බිය දක්වන්නේ නම් (යහපත)යැ'යි ඇය කීවාය.

قَالَ اِنَّمَآ اَنَا رَسُوْلُ رَبِّكِ ۖ لِاَهَبَ لَكِ غُلٰمًا زَكِيًّا ⑳

20. 'මා ඔබ වෙත පිවිතුරු පුත්‍රයෙකු (පිළිබඳ සුභාරංචිය) පිරිනමනු පිණිස මම ඔබ අධිපතියාණන්ගේ පණිවිඩකරුවෙකු පමණක් වෙමි'යි ඔහු පිළිතුරු දුන්නේය.

قَالَتْ اَنّٰى يَكُوْنُ لِيْ غُلٰمٌ وَّلَمْ يَمْسَسْنِيْ بَشَرٌ وَّلَمْ اَكُ بَغِيًّا ㉑

21. 'කිසිදු මිනිසෙකු මාව ස්පර්ශ කර නොමැතිව සිටිත්දී මා අපචාරී නොවී සිටිත්දී මා පුතකු ලබන්නේ කෙසේදැ?'යි ඇය කීවාය.

قَالَ كَذٰلِكِ ۚ قَالَ رَبُّكِ هُوَ عَلَيَّ هَيِّنٌ ۚ وَلِنَجْعَلَهٗٓ اٰيَةً لِّلنَّاسِ وَرَحْمَةً مِّنَّا ۚ وَكَانَ اَمْرًا مَّقْضِيًّا ㉒

22. ඔහු(සුරදූතයා) "එලෙසය. එහෙත් ඔබගේ අධිපතියාණන්, 'එය මට පහසු දෙයකි. තවද අපි ඔහුව මිනිසුන් හට සලකුණක් මෙන්ම අප වෙතින් දයාවක්ද තවද එය නියම කරන ලද දෙයක් වනු පිණිස (අපි එසේ කරන්නෙමු)'යි පැවසුවේයැ"යි කීවේය.

23. එබැවින් ඇය ඔහුව(දරුවාව) පිළිසිඳ ගත්තාය. තවද ඇය ඔහු සමග ඈත්වූ තැනකට නික්ම ගියාය.

فَحَمَلَتۡهُ فَانۡتَبَذَتۡ بِهٖ مَكَانًا قَصِيًّا ﴿٢٣﴾

24. පසුව විලිරුදාව ඇයව රටඉඳි ගසේ කඳක් වෙතට ගෙන ගියේය. 'අහෝ! මා මෙයට පෙර මිය ගියා නම්! තවද මා මුළුමනින්ම අමතක කරන ලද්දක් වූවා නම්!' යැයි ඇය පැවසුවාය.

فَاَجَآءَهَا الۡمَخَاضُ اِلٰى جِذۡعِ النَّخۡلَةِ ۚ قَالَتۡ يٰلَيۡتَنِىۡ مِتُّ قَبۡلَ هٰذَا وَكُنۡتُ نَسۡيًا مَّنۡسِيًّا ﴿٢٤﴾

25. පසුව ඔහු(සුරදූතයා), ඇයට පහළින් සිට, 'කනස්සල්ලට පත් නොවන්න. ඔබගේ අධිපතියාණන් ඔබට පහළින් දොළක් ගලා යෑමට සලස්වා ඇතැ'යි ඇයට (පවසමින්) හඬ ගැසුවේය.

فَنَادٰٮهَا مِنۡ تَحۡتِهَاۤ اَلَّا تَحۡزَنِىۡ قَدۡ جَعَلَ رَبُّكِ تَحۡتَكِ سَرِيًّا ﴿٢٥﴾

26. 'තවද රටඉඳි ගසෙහි කඳ ඔබ දෙසට සොලවන්න. එවිට ඉදුණු නැවුම් රටඉඳි ඔබ මත වැටෙනු ඇත'.

وَهُزِّىۡۤ اِلَيۡكِ بِجِذۡعِ النَّخۡلَةِ تُسٰقِطۡ عَلَيۡكِ رُطَبًا جَنِيًّا ﴿٢٦﴾ۙ

27. "එබැවින් අනුභව කරන්න. පානය කරන්න. තවද (ඔබගේ) නෙත් සිසිල් කරගන්න. තවද ඔබ යම්කිසි මිනිසෙකුව දුටුවේ නම් 'මහා කාරුණික වූ (දෙවියන්) වෙත උපවාසය සඳහා මම භාර වී ඇත්තෙමි. එනිසා අද දින මම කිසිදු මනුෂ්‍යයෙකු හා කථා නොකරන්නෙමි'යි පවසන්න".

فَكُلِىۡ وَاشۡرَبِىۡ وَقَرِّىۡ عَيۡنًا ۚ فَاِمَّا تَرَيِنَّ مِنَ الۡبَشَرِ اَحَدًا ۙ فَقُوۡلِىۡۤ اِنِّىۡ نَذَرۡتُ لِلرَّحۡمٰنِ صَوۡمًا فَلَنۡ اُكَلِّمَ الۡيَوۡمَ اِنۡسِيًّا ﴿٢٧﴾ۚ

28. පසුව ඇය ඔහු(දරුවා) කැටුව ඇගේ ජනතාව වෙත ආවාය. 'එම්බා මර්යම්! ඔබ නරක දෙයක් කර ඇතැ'යි ඔවුහු කීහ.

فَاَتَتۡ بِهٖ قَوۡمَهَا تَحۡمِلُهٗ ؕ قَالُوۡا يٰمَرۡيَمُ لَقَدۡ جِئۡتِ شَيۡـًٔا فَرِيًّا ﴿٢٨﴾

29. 'එම්බා හාරූන්ගේ සොයුරිය! ඔබගේ පියා දුෂ්ඨ මිනිසෙකු නොවීය. තවද ඔබගේ මව අපචාරී නොවූවාය!'.

يٰۤاُخۡتَ هٰرُوۡنَ مَا كَانَ اَبُوۡكِ امۡرَاَ سَوۡءٍ وَّمَا كَانَتۡ اُمُّكِ بَغِيًّا ﴿٢٩﴾ۖۚ

فَاَشَارَتۡ اِلَيۡهِؕ قَالُوۡا كَيۡفَ نُكَلِّمُ مَنۡ كَانَ فِى الۡمَهۡدِ صَبِيًّا ﴿۳۰﴾

30. පසුව ඇය (අතින්) ඔහු දෙස පෙන්වූවාය. 'තොටිල්ලෙහි වැඩෙන දරුවකු හා අපි කෙසේ කථා කරන්නෙමුදැ?' යි ඔවුහු කීහ.

قَالَ اِنِّىۡ عَبۡدُ اللّٰهِ ؕ اٰتٰٮنِىَ الۡكِتٰبَ وَجَعَلَنِىۡ نَبِيًّا ۙ ﴿۳۱﴾

31. 'මම අල්ලාහ්ගේ දාසයෙක් වෙමි. ඔහු මා වෙත පුස්තකය ලබාදී මා වක්තෘවරයෙකු කළේයැ'යි ඔහු(ඊසා) කීවේය.

وَّجَعَلَنِىۡ مُبٰرَكًا اَيۡنَ مَا كُنۡتُ وَاَوۡصٰنِىۡ بِالصَّلٰوةِ وَالزَّكٰوةِ مَا دُمۡتُ حَيًّا ۖ ﴿۳۲﴾

32. 'තවද මා කොතැනක සිටියද ඔහු මා ආශිර්වාද ලද්දෙකු කර ඇත්තේය. තවද මා ජීවත්ව සිටින තුරු නැමදුම් කිරීම සහ දන්දීම මා හට අණ කර ඇත්තේය'.

وَّبَرًّاۢ بِوَالِدَتِىۡ وَلَمۡ يَجۡعَلۡنِىۡ جَبَّارًا شَقِيًّا ﴿۳۳﴾

33. 'එමෙන්ම මාගේ මෑණියන්ට යහපත් අන්දමින් යුතුකම් ඉටු කිරීමටද (ඔහු මා පත්කර ඇත්තේය.) තවද ඔහු මා අහංකාර (හා) අභාග්‍ය වන්තයෙකු කර නැත්තේය'.

وَالسَّلٰمُ عَلَىَّ يَوۡمَ وُلِدْتُّ وَيَوۡمَ اَمُوۡتُ وَيَوۡمَ اُبۡعَثُ حَيًّا ﴿۳۴﴾

34. 'තවද මා උපත ලැබූ දිනයේදී මා කෙරෙහි සාමය විය. තවද මා මිය යන දිනයේදීද තවද (නැවත) මා ජීවය ලබා නැගිටුවනු ලබන දිනයේදීද (මා කෙරෙහි සාමය වනු ඇත)'.

ذٰلِكَ عِيۡسَى ابۡنُ مَرۡيَمَ ۚ قَوۡلَ الۡحَـقِّ الَّذِىۡ فِيۡهِ يَمۡتَرُوۡنَ ﴿۳۵﴾

35. මර්යම්ගේ පුත් ඊසා එවැන්නෙකු විය. (මෙය) ඔවුන් සැක කරන දේ පිළිබඳව සත්‍යය ප්‍රකාශයකි.

مَا كَانَ لِلّٰهِ اَنۡ يَّتَّخِذَ مِنۡ وَّلَدٍ ۙ سُبۡحٰنَهٗ ؕ اِذَا قَضٰٓى اَمۡرًا فَاِنَّمَا يَقُوۡلُ لَهٗ كُنۡ فَيَكُوۡنُ ؕ ﴿۳۶﴾

36. තමා වෙත පුතෙකු ඇතිකර ගැනීම අල්ලාහ්(ගේ මහානුභාවය)ට නොගැළපේ. ඔහු පාරිශුද්ධය. ඔහු යමක් ගැන තීන්දු කරන විට එයට 'වනු'යි ඔහු පවසයි. එවිට එය වන්නේය.

وَاِنَّ اللّٰهَ رَبِّىۡ وَرَبُّكُمۡ فَاعۡبُدُوۡهُ ؕ

37. 'නියතවශයෙන්ම අල්ලාහ් මාගේ අධිපතියාණන් මෙන්ම නුඹලාගේද

| | |
|---|---|
| هٰذَا صِرَاطٌ مُّسْتَقِيْمٌ ﴿٣٧﴾ | අධිපතියාණන් වේ. එබැවින් ඔහුට (පමණක්) නමදිනු. මෙයම සෘජු මාර්ගය වේ'(යැයි ඊසා පැවසුවේය). |
| فَاخْتَلَفَ الْاَحْزَابُ مِنْۢ بَيْنِهِمْ ۚ فَوَيْلٌ لِّلَّذِيْنَ كَفَرُوْا مِنْ مَّشْهَدِ يَوْمٍ عَظِيْمٍ ﴿٣٨﴾ | 38. එහෙත් පාර්ශ්වයන් තමන් අතරම භේද ඇති කර ගත්හ. එමනිසා කවුරුන් හෝ අවිශ්වාස කරන්නේද ඔවුනට මහත් වූ දිනය හමුවීමෙන් විපතකි. |
| اَسْمِعْ بِهِمْ وَاَبْصِرْ ۙ يَوْمَ يَاْتُوْنَنَا لٰكِنِ الظّٰلِمُوْنَ الْيَوْمَ فِيْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٣٩﴾ | 39. ඔවුන් අප වෙත පැමිණෙන්නාවූ එම දිනයේදී ඔවුන්ගේ ඇසීම සහ දැකීම කෙතරම් තියුණුද! එහෙත් අද දින වරදකරුවන් ප්‍රකට වරදෙහිය. |
| وَاَنْذِرْهُمْ يَوْمَ الْحَسْرَةِ اِذْ قُضِيَ الْاَمْرُ ۘ وَهُمْ فِيْ غَفْلَةٍ وَّهُمْ لَا يُؤْمِنُوْنَ ﴿٤٠﴾ | 40. තවද එම ශෝක දිනය ගැන ඔවුනට අවවාද කරන්න. එවිට කාරණය තීන්දු කරනු ලබන්නේය. නමුත් ඔවුන් (දැන්) නොසැලකිලිමත්ව සිටිති. තවද ඔවුහු විශ්වාස නොකරති. |
| اِنَّا نَحْنُ نَرِثُ الْاَرْضَ وَمَنْ عَلَيْهَا وَاِلَيْنَا يُرْجَعُوْنَ ﴿٤١﴾ | 41. නියතවශයෙන්ම පොළොව මෙන්ම එහි ඇති (සියළු) දෑහි උරුම කරුවන් අපිමය. තවද ඔවුන් (සියල්ලන්ම) ආපසු ගෙන එනු ලබන්නේද අප වෙතටමය. |
| وَاذْكُرْ فِي الْكِتٰبِ اِبْرٰهِيْمَ ۬ اِنَّهٗ كَانَ صِدِّيْقًا نَّبِيًّا ﴿٤٢﴾ | 42. තවද ඉබ්රාහිම් ගැන ග්‍රන්ථයෙහි (සඳහන් දේ) කියා දෙන්න. ඔහු සත්‍යවන්තයෙක් (මෙන්ම) වක්තෘවරයෙක් විය. |
| اِذْ قَالَ لِاَبِيْهِ يٰۤاَبَتِ لِمَ تَعْبُدُ مَا لَا يَسْمَعُ وَلَا يُبْصِرُ وَلَا يُغْنِيْ عَنْكَ شَيْـًٔا ﴿٤٣﴾ | 43. ඔහු තම පියාට, 'එම්බල මාගේ පියාණෙනි! නොඅසන, නොදකින එමෙන්ම ඔබට කිසිදු ප්‍රයෝජනයක් දිය නොහැකි දෙයකට ඔබ වැඳුම් පිදුම් කරන්නේ ඇයි?' දැයි කියූ විට (එම අවස්ථාව සිහි කරන්න). |
| يٰۤاَبَتِ اِنِّيْ قَدْ جَآءَنِيْ مِنَ الْعِلْمِ مَا لَمْ | 44. 'එම්බල මාගේ පියාණෙනි! ඔබ |

| | |
|---|---|
| වෙත නොපැමිණි දැනුම ඇත්තෙන්ම මා වෙත පැමිණ ඇත. එබැවින් මා අනුගමනය කරන්න. මම ඔබට නිවැරදි මාර්ගය පෙන්වන්නෙමි'. | يَأْتِكَ فَاتَّبِعْنِيٓ أَهْدِكَ صِرَاطًا سَوِيًّا ﴿٤٤﴾ |
| 45. 'එම්බල මාගේ පියාණෙනි! ෂෙයිතාන්ට නොවඳින්න. නියතවශයෙන්ම ෂෙයිතාන් මහා කාරුණික (දෙවියන්)ට අකීකරු වන්නෙකි'. | يَٰٓأَبَتِ لَا تَعْبُدِ ٱلشَّيْطَٰنَ ۖ إِنَّ ٱلشَّيْطَٰنَ كَانَ لِلرَّحْمَٰنِ عَصِيًّا ﴿٤٥﴾ |
| 46. 'එම්බල මාගේ පියාණෙනි! මහා කාරුණික (දෙවියන්) වෙතින් දඬුවමක් ඔබව හසුකරනු ඇතැයි මම බිය වෙමි. තවද ඔබ ෂෙයිතාන්ගේ සහායකයකු වන්නෙහිය'. | يَٰٓأَبَتِ إِنِّيٓ أَخَافُ أَن يَمَسَّكَ عَذَابٌ مِّنَ ٱلرَّحْمَٰنِ فَتَكُونَ لِلشَّيْطَٰنِ وَلِيًّا ﴿٤٦﴾ |
| 47. ඔහු, 'ඔබ මාගේ දෙවිවරුන්ව හෙළා දකින්නේද? එම්බල ඉබ්රාහිම්! ඔබ නොවැළකුනෙ නම් නියතවශයෙන්ම මම ඔබව ගල් ගසා (මරා) දමන්නෙමි. දැන් දිගු කලකට මා තනිව අත්හරින්නැ'යි පිළිතුරු දුන්නේය. | قَالَ أَرَاغِبٌ أَنتَ عَنْ ءَالِهَتِى يَٰٓإِبْرَٰهِيمُ ۖ لَئِن لَّمْ تَنتَهِ لَأَرْجُمَنَّكَ ۖ وَٱهْجُرْنِى مَلِيًّا ﴿٤٧﴾ |
| 48. 'ඔබට සාමය අත්වේවා. මම මාගේ අධිපතියාණන්ගෙන් ඔබට ක්ෂමාව අයැදින්නෙමි. ඔහු ඇත්තෙන්ම මා හට කරුණාවන්තයැ'යි (ඉබ්රාහිම්) පැවසුවේය. | قَالَ سَلَٰمٌ عَلَيْكَ ۖ سَأَسْتَغْفِرُ لَكَ رَبِّىٓ ۖ إِنَّهُۥ كَانَ بِى حَفِيًّا ﴿٤٨﴾ |
| 49. 'තවද මම නුඹලාගෙන්ද අල්ලාහ් හැර නුඹලා කැඳවන දෙයින්ද මම ඉවත්ව සිටින්නෙමි. තවද මම මාගේ අධිපතියාණන්ට (පමණක්) යාච්ඤා කරන්නෙමි. මා මාගේ අධිපතියාණන්ට යාච්ඤා කිරීමෙන් කලකිරීමට පත් නොවන්නෙමි'. | وَأَعْتَزِلُكُمْ وَمَا تَدْعُونَ مِن دُونِ ٱللَّهِ وَأَدْعُوا۟ رَبِّى عَسَىٰٓ أَلَّآ أَكُونَ بِدُعَآءِ رَبِّى شَقِيًّا ﴿٤٩﴾ |
| 50. පසුව ඔහු ඔවුන් වෙතින්ද අල්ලාහ් හැර ඔවුන් වැඳුම් පිදුම් කළ දෙයින්ද වෙන් වී සිටි කල්හි අපි ඔහුට ඉස්හාක්වද යඃකූබ්වද පිරිනැමුවෙමු. (ඔවුන්) සෑම කෙනෙකුවම අපි වක්තෘවරයෙකු කළෙමු. | فَلَمَّا ٱعْتَزَلَهُمْ وَمَا يَعْبُدُونَ مِن دُونِ ٱللَّهِ وَهَبْنَا لَهُۥٓ إِسْحَٰقَ وَيَعْقُوبَ ۖ وَكُلًّا جَعَلْنَا نَبِيًّا ﴿٥٠﴾ |

وَوَهَبْنَا لَهُمْ مِّنْ رَّحْمَتِنَا وَجَعَلْنَا لَهُمْ لِسَانَ صِدْقٍ عَلِيًّا ﴿٥١﴾

51. තවද අපි ඔවුනට අපගේ කරුණා මහිමය පිරිනැමුවෙමු. අපි ඔවුනට සැබෑ කීර්තියක්ද අත්කර දුනිමු.

وَاذْكُرْ فِي الْكِتٰبِ مُوسٰى إِنَّهُ كَانَ مُخْلَصًا وَّكَانَ رَسُولًا نَّبِيًّا ﴿٥٢﴾

52. තවද මූසා ගැන ග්‍රන්ථයෙහි (සඳහන් දේ) කියා දෙන්න. ඇත්තෙන්ම ඔහු තෝරාගනු ලැබූ කෙනෙක් විය. තවද ඔහු දූතයෙකු මෙන්ම වක්තෘවරයෙකුද විය.

وَنَادَيْنٰهُ مِنْ جَانِبِ الطُّورِ الْأَيْمَنِ وَقَرَّبْنٰهُ نَجِيًّا ﴿٥٣﴾

53. තවද අපි ඔහුව තූර් කන්දෙහි දකුණු පසින් කැඳවීමු. තවද අපි ඔහුව (විශේෂ) සම්භාෂණයක් සඳහා (අපට) සමීපවන්නට සැලැස්වීමු.

وَوَهَبْنَا لَهُ مِنْ رَّحْمَتِنَا أَخَاهُ هٰرُوْنَ نَبِيًّا ﴿٥٤﴾

54. තවද අපගේ කරුණා මහිමයෙන් වක්තෘවරයෙකු ලෙස අපි ඔහුගේ සොහොයුරු හාරූන්ව ඔහුට පිරිනැමුවෙමු.

وَاذْكُرْ فِي الْكِتٰبِ إِسْمٰعِيلَ إِنَّهُ كَانَ صَادِقَ الْوَعْدِ وَكَانَ رَسُولًا نَّبِيًّا ﴿٥٥﴾

55. තවද ඉස්මාඊල් ගැන ග්‍රන්ථයෙහි (සඳහන් දේ) කියා දෙන්න. ඇත්තෙන්ම ඔහු (තම) පොරොන්දුව (රැකීමෙහිලා) ස්ථාවරව සිටියේය. තවද ඔහු දූතයෙක් මෙන්ම වක්තෘවරයෙක්ද විය.

وَكَانَ يَأْمُرُ أَهْلَهُ بِالصَّلٰوةِ وَالزَّكٰوةِ وَكَانَ عِنْدَ رَبِّهِ مَرْضِيًّا ﴿٥٦﴾

56. ඔහු තම ජනතාවට නැමදුම් කිරීමටත් zසකාත් (දුගීබද්ද) ගෙවීමටත් අණ කරමින් සිටියේය. තවද ඔහු තම අධිපතියාණන්ට මහත් ප්‍රිය කෙනෙක් විය.

وَاذْكُرْ فِي الْكِتٰبِ إِدْرِيسَ إِنَّهُ كَانَ صِدِّيقًا نَّبِيًّا ﴿٥٧﴾

57. තවද ඉද්රීස් ගැන ග්‍රන්ථයෙහි (සඳහන් දේ) කියා දෙන්න. ඔහු සත්‍යවන්තයෙක් (මෙන්ම) වක්තෘවරයෙක්ද විය.

وَّرَفَعْنٰهُ مَكَانًا عَلِيًّا ﴿٥٨﴾

58. තවද අපි ඔහුව උතුම් වූ ස්ථානයකට උසස් කළෙමු.

أُولٰٓئِكَ الَّذِينَ أَنْعَمَ اللّٰهُ عَلَيْهِمْ مِّنَ النَّبِيّٖنَ مِنْ ذُرِّيَّةِ اٰدَمَ وَمِمَّنْ حَمَلْنَا

59. ආදම්ගේ පැවත එන්නන්ගෙන්ද අප නූහ් සමග (නැවෙහි) ගෙන ගිය අයගෙන්ද ඉබ්රාහිම් හා ඉස්රාඊල්ගේ පරපුරෙන්ද අප මග

مَعَ نُوحٍ وَمِن ذُرِّيَّةِ إِبْرَٰهِيمَ وَإِسْرَٰٓءِيلَ وَمِمَّنْ هَدَيْنَا وَٱجْتَبَيْنَآ ۚ إِذَا تُتْلَىٰ عَلَيْهِمْ ءَايَٰتُ ٱلرَّحْمَٰنِ خَرُّوا۟ سُجَّدًا وَبُكِيًّا ۩ ﴿٥٩﴾

පෙන්වා එමෙන්ම තෝරාගත් අයගෙන්ද අල්ලාහ් තම ආශිර්වාදය පිරිනැමූ වක්තෘවරුන්ගෙන් වූ ජනතාව මේ අය වෙති. ඔවුන් වෙත මහා කාරුණික (දෙවියන්)ගේ වදන් පාරායනා කරනු ලැබූ විට ඔවුහු දණ්ඩ නමස්කාර කරමින්ද වැලපෙමින්ද (දෙවියන් ඉදිරියෙහි) වැටුණහ.

فَخَلَفَ مِنۢ بَعْدِهِمْ خَلْفٌ أَضَاعُوا۟ ٱلصَّلَوٰةَ وَٱتَّبَعُوا۟ ٱلشَّهَوَٰتِ ۖ فَسَوْفَ يَلْقَوْنَ غَيًّا ﴿٦٠﴾

60. අනතුරුව ඔවුනට පසු පරපුරක් පැමිණියහ. ඔවුහු නැමදුම නොසලකා හරිමින් දුෂ්ඨ ආශාවන් අනුගමනය කළහ. පසුව ඔවුහු දුර්මාර්ගයේ ප්‍රතිවිපාකය දකිනු ඇත.

إِلَّا مَن تَابَ وَءَامَنَ وَعَمِلَ صَٰلِحًا فَأُو۟لَٰٓئِكَ يَدْخُلُونَ ٱلْجَنَّةَ وَلَا يُظْلَمُونَ شَيْـًٔا ﴿٦١﴾

61. පසුතැවිලි වී විශ්වාස කර යහපත් ක්‍රියාවන්හි යෙදෙන්නන් හැරෙන්නටය. මොවුහු ස්වර්ගයට පිවිසෙන්නෝය. තවද මොවුන්ට අල්පමාත්‍රයක්වත් අසාධාරණය නොකරනු ලබන්නේය.

جَنَّٰتِ عَدْنٍ ٱلَّتِى وَعَدَ ٱلرَّحْمَٰنُ عِبَادَهُۥ بِٱلْغَيْبِ ۚ إِنَّهُۥ كَانَ وَعْدُهُۥ مَأْتِيًّا ﴿٦٢﴾

62. නිත්‍ය උද්‍යානයන් පිළිබඳව මහා කාරුණිකවූ (දෙවියන්) තම දාසයින්ට අදෘශ්‍යමානව පොරොන්දු වී ඇත. නියතවශයෙන්ම ඔහුගේ පොරොන්දුව ඉටුවන්නේමය.

لَّا يَسْمَعُونَ فِيهَا لَغْوًا إِلَّا سَلَٰمًا ۖ وَلَهُمْ رِزْقُهُمْ فِيهَا بُكْرَةً وَعَشِيًّا ﴿٦٣﴾

63. සාමයේ (සුභ පැතුම්) පමණක් හැර කිසිදු නිෂ්ඵල දෙයක් ඔවුහු එහිදී නොඅසන්නෝය. එහිදී උදය සහ සවස ඔවුන්ගේ පෝෂණය ඔවුනට ලැබෙනු ඇත.

تِلْكَ ٱلْجَنَّةُ ٱلَّتِى نُورِثُ مِنْ عِبَادِنَا مَن كَانَ تَقِيًّا ﴿٦٤﴾

64. බියබැතිමත් වන අපගේ දාසයින්ට අප උරුමකර දෙන ස්වර්ගය මෙවැන්නක් වේ.

وَمَا نَتَنَزَّلُ إِلَّا بِأَمْرِ رَبِّكَ ۖ لَهُۥ مَا

65. තවද 'ඔබගේ අධිපතියාණන්ගේ

بَيْنَ أَيْدِينَا وَمَا خَلْفَنَا وَمَا بَيْنَ ذَٰلِكَ ۚ وَمَا كَانَ رَبُّكَ نَسِيًّا ﴿٦٥﴾

විධානයෙන් මිස (සුරදූතයෝ වන) අපි පහළ නොවන්නෙමු. අප ඉදිරිපස ඇති සියළු දේද අප පසු පස ඇති සියළු දේද අප අතරෙහි ඇති සියළු දේද ඔහුට අයත් වේ. තවද ඔබගේ අධිපතියාණන් අමතක කරන්නෙක් නොවේ'.

رَبُّ السَّمَاوَاتِ وَالْأَرْضِ وَمَا بَيْنَهُمَا فَاعْبُدْهُ وَاصْطَبِرْ لِعِبَادَتِهِ ۚ هَلْ تَعْلَمُ لَهُ سَمِيًّا ﴿٦٦﴾

66. (ඔහු) අහස්හිද පොළොවෙහිද එමෙන්ම ඒ දෙක අතර ඇති සියල්ලෙහිද අධිපතියාණන්ය. එබැවින් ඔහුව නමදින්න. තවද ඔහුගේ නැමදුමෙහි ස්ථිරසාර වන්න. ඔහුට සමාන කිසිවෙකුව ඔබ දන්නෙහිද?

وَيَقُولُ الْإِنسَانُ أَإِذَا مَا مِتُّ لَسَوْفَ أُخْرَجُ حَيًّا ﴿٦٧﴾

67. තවද මිනිසා, 'කිම! මා මිය ගිය විට නැවත මා ජීවයෙන් ගෙන එනු ලබන්නේදැ?'යි පවසයි.

أَوَلَا يَذْكُرُ الْإِنسَانُ أَنَّا خَلَقْنَاهُ مِن قَبْلُ وَلَمْ يَكُ شَيْئًا ﴿٦٨﴾

68. මිනිසා ඔහු පෙර ශූන්‍යව සිටියදී අපි ඔහුව මැවූ ආකාරය (ඔහු) මෙනෙහි නොකරන්නේද?

فَوَرَبِّكَ لَنَحْشُرَنَّهُمْ وَالشَّيَاطِينَ ثُمَّ لَنُحْضِرَنَّهُمْ حَوْلَ جَهَنَّمَ جِثِيًّا ﴿٦٩﴾

69. තවද ඔබගේ අධිපතියාණන් සාක්කි. අපි නියතවශයෙන්ම ඔවුන්වද ෂෛයිතානුන්වද එක්රැස් කරන්නෙමු. තවද පසුව අපි ඔවුන්ව නිරය වටා මුණින් වැටුණු ආකාරයෙන් ගෙන එන්නෙමු.

ثُمَّ لَنَنزِعَنَّ مِن كُلِّ شِيعَةٍ أَيُّهُمْ أَشَدُّ عَلَى الرَّحْمَٰنِ عِتِيًّا ﴿٧٠﴾

70. පසුව සෑම කාණ්ඩායමකින්ම කාරුණික වූ (දෙවියන්ට) එරෙහිව කැරලි ගැසීමෙහි ඉතා දරුණු අයව නියතවශයෙන්ම අපි ඇද දමන්නෙමු.

ثُمَّ لَنَحْنُ أَعْلَمُ بِالَّذِينَ هُمْ أَوْلَىٰ بِهَا صِلِيًّا ﴿٧١﴾

71. තවද එහි දවනු ලබන්නට වඩාත්ම යෝග්‍ය වන්නන් කවුරුන්දැයි නියතවශයෙන්ම අපි ඉතා මැනැවින් දනිමු.

وَإِن مِّنكُمْ إِلَّا وَارِدُهَا ۚ كَانَ عَلَىٰ رَبِّكَ

72. තවද එය වෙත නොපැමිණෙන්නාවූ (වරදකරුවන්

حَتۡمًا مَّقۡضِيًّا ٧٢

වන) නුඹලාගෙන් කිසිවෙකු මිස නැත. මෙය ඔබගේ අධිපතියාණන්ගේ ස්ථිර වූ නියමයකි.

ثُمَّ نُنَجِّي ٱلَّذِينَ ٱتَّقَوا۟ وَّنَذَرُ ٱلظَّٰلِمِينَ فِيهَا جِثِيًّا ٧٣

73. පසුව අපි බියබැතිමත් අයව බේරාගන්නෙමු. තවද අපි වරදකරුවන්ව එහි මුණින් වැටී සිටීමට හරින්නෙමු.

وَإِذَا تُتۡلَىٰ عَلَيۡهِمۡ ءَايَٰتُنَا بَيِّنَٰتٖ قَالَ ٱلَّذِينَ كَفَرُوا۟ لِلَّذِينَ ءَامَنُوٓا۟ أَيُّ ٱلۡفَرِيقَيۡنِ خَيۡرٞ مَّقَامٗا وَأَحۡسَنُ نَدِيّٗا ٧٤

74. එමෙන්ම ඔවුන් වෙත අපගේ පැහැදිලි වදන් පාරායනා කරනු ලැබූ කල්හි, අවිශ්වාසිතයින්, 'මේ දෙපාර්ශවයන්ගෙන් තත්ත්වයෙන් වඩාත් උසස් එමෙන්ම සභා මණ්ඩපයෙන් වඩාත් සිත්ගන්නා සුළු කවුරුන්ද,'යි විශ්වාසිතයින්ගෙන් අසති.

وَكَمۡ أَهۡلَكۡنَا قَبۡلَهُم مِّن قَرۡنٍ هُمۡ أَحۡسَنُ أَثَٰثٗا وَرِءۡيٗا ٧٥

75. තවද සම්පත්වලින්ද බාහිර පෙනුමෙන්ද වඩාත් හොඳ පරම්පරාවන් කොපමණක් ඔවුනට පෙර අපි විනාශ කර ඇත්තෙමුද?

قُلۡ مَن كَانَ فِي ٱلضَّلَٰلَةِ فَلۡيَمۡدُدۡ لَهُ ٱلرَّحۡمَٰنُ مَدًّاۚ حَتَّىٰٓ إِذَا رَأَوۡا۟ مَا يُوعَدُونَ إِمَّا ٱلۡعَذَابَ وَإِمَّا ٱلسَّاعَةَ فَسَيَعۡلَمُونَ مَنۡ هُوَ شَرّٞ مَّكَانٗا وَأَضۡعَفُ جُندٗا ٧٦

76. 'නොමගෙහි සිටින අයට මහා කාරුණික වූ (දෙවියන්) ඔවුනට පොරොන්දු වූ දෙය එය දඬුවමක් හෝ වේවා (අවසන් කාලයේ) හෝරාවක් හෝ වේවා ඔවුන් දකින තුරු දීර්ඝ කාල අවකාශයක් දෙන්නේය. එවිට තත්ත්වයෙන් වඩාත් නරක කවුරුන්ද යන්නත් සේනා බලයෙන් වඩාත් දුර්වල කවුරුන්ද යන්නත් ඔවුන්ට වැටහී යනු ඇත'යි පවසන්න.

وَيَزِيدُ ٱللَّهُ ٱلَّذِينَ ٱهۡتَدَوۡا۟ هُدٗىۗ وَٱلۡبَٰقِيَٰتُ ٱلصَّٰلِحَٰتُ خَيۡرٌ عِندَ رَبِّكَ ثَوَابٗا وَخَيۡرٞ مَّرَدًّا ٧٧

77. තවද යහමග අනුගමනය කරන අයට අල්ලාහ් යහමගෙහි වර්ධනය කරන්නේය. තවද ඔබගේ අධිපතියාණන් අභියස සදා පවතින යහපත් ක්‍රියාවන් තිළිණය වශයෙන් වඩාත් හොඳ මෙන්ම අවසන් ප්‍රතිඵලය වශයෙන්ද වඩාත් හොඳය.

أَفَرَءَيۡتَ ٱلَّذِي كَفَرَ بِـَٔايَٰتِنَا وَقَالَ

78. අපගේ සළකුණු කෙරෙහි අවිශ්වාස කර 'සැබැවින්ම මා හට

لَأُوتَيَنَّ مَالًا وَّوَلَدًا ۝٧٨

වස්තුව සහ දරුවන් දෙනු ලබන්නේය'යි කියන අයව ඔබ දැක තිබේද?

اَطَّلَعَ الْغَيْبَ اَمِ اتَّخَذَ عِنْدَ الرَّحْمٰنِ عَهْدًا ۝٧٩

79. ගුප්ත දේ ගැන ඔහු දැනගෙන තිබේද? නැතහොත් මහා කාරුණික වූ (දෙවියන්) වෙතින් ඔහු පොරොන්දුවක් ලබාගෙන තිබේද?

كَلَّا ۚ سَنَكْتُبُ مَا يَقُوْلُ وَنَمُدُّ لَهٗ مِنَ الْعَذَابِ مَدًّا ۝٨٠

80. එසේ නොව! ඔහු පවසන දේ අපි සටහන් කරන්නෙමු. තවද අපි ඔහුට අධික ලෙස දඬුවම දීර්ඝ කරන්නෙමු.

وَّنَرِثُهٗ مَا يَقُوْلُ وَيَأْتِيْنَا فَرْدًا ۝٨١

81. තවද ඔහු කථා කරන (සියළු) දේ අපි උරුම කරගන්නෙමු. තවද ඔහු අප වෙත පැමිණෙන්නේ තනිවමය.

وَاتَّخَذُوْا مِنْ دُوْنِ اللّٰهِ اٰلِهَةً لِّيَكُوْنُوْا لَهُمْ عِزًّا ۝٨٢

82. තවද මොවුහු තමන්ට ගෞරවය හිමිවනු පිණිස අල්ලාහ් හැර (අන්) දෙවිවරුන්ව ගත්තෝය.

كَلَّا ۚ سَيَكْفُرُوْنَ بِعِبَادَتِهِمْ وَيَكُوْنُوْنَ عَلَيْهِمْ ضِدًّا ۝٨٣

83. අවධාරණයයි! ඔවුන්(දෙවිවරුන්) මොවුන්ගේ වැඳුම් පිදුම් ප්‍රතික්ෂේප කරන්නෝය. තවද මොවුන්ගේ විරුද්ධවාදීන් වන්නෝය.

اَلَمْ تَرَ اَنَّاۤ اَرْسَلْنَا الشَّيٰطِيْنَ عَلَى الْكٰفِرِيْنَ تَؤُزُّهُمْ اَزًّا ۝٨٤

84. අපි ෂෙයිතානුන්ව අවිශ්වාසීතයින් වෙතට (අකීකරු ක්‍රියාවන්හි) ඔවුන්ව පොළඹවීම සඳහා එවා ඇති බව ඔබ නොදකින්නෙහිද?

فَلَا تَعْجَلْ عَلَيْهِمْ ؕ اِنَّمَا نَعُدُّ لَهُمْ عَدًّا ۝٨٥

85. එබැවින් ඔබ ඔවුන් සම්බන්ධයෙන් ඉක්මන් නොවන්න. ඔවුන්(ගේ ක්‍රියාවන්) පිළිබඳව අපි මුළුමනින්ම ගණන් තබන්නෙමු.

يَوْمَ نَحْشُرُ الْمُتَّقِيْنَ اِلَى الرَّحْمٰنِ وَفْدًا ۝٨٦

86. අප බියබැතිමතුන්ව (ගෞරවනීය) අමුත්තන් ලෙස මහා කාරුණික වූ (දෙවියන්) හමුවේ එක්රැස් කරන එම දිනය (සිහිපත් කරන්න.)

وَّنَسُوْقُ الْمُجْرِمِيْنَ اِلٰى جَهَنَّمَ وِرْدًا ۝٨٧

87. තවද අපි වරදකරුවන්ව දිය කඩිත්තකට බසින රංචුවක් මෙන් නිරය වෙතට දක්කාගෙන යන්නෙමු.

لَا يَمْلِكُوْنَ الشَّفَاعَةَ اِلَّا مَنِ اتَّخَذَ عِنْدَ الرَّحْمٰنِ عَهْدًا ۝٨٨

88. මහා කාරුණික වූ (දෙවියන්) වෙතින් පොරොන්දුවක් ලැබූ තැනැත්තා හැරෙන්නට අන් අයට මැදිහත් වීමේ බලයක් නොවන්නේය.

وَقَالُوا اتَّخَذَ الرَّحْمٰنُ وَلَدًا ۝٨٩

89. තවද 'මහා කාරුණික වූ (දෙවියන්) තමා වෙත පුතෙකු ගෙන ඇතැ'යි ඔවුහු කියති.

لَقَدْ جِئْتُمْ شَيْـًٔا اِدًّا ۝٩٠

90. සැබැවින්ම නුඹලා කර ඇත්තේ අතිශයින්ම භයානක දෙයකි!

تَكَادُ السَّمٰوٰتُ يَتَفَطَّرْنَ مِنْهُ وَتَنْشَقُّ الْاَرْضُ وَتَخِرُّ الْجِبَالُ هَدًّا ۝٩١

91. එයින් අහස් පැලී යෑමටද පොළොව දෙකඩ වී යෑමටද එමෙන්ම කඳු සුනුවිසුනු වී වැටී යෑමටද ඉඩ ඇත.

اَنْ دَعَوْا لِلرَّحْمٰنِ وَلَدًا ۝٩٢

92. මන්දයත් මහා කාරුණික වූ (අල්ලාහ්)ට ඔවුන් පුතෙකුව ආරෝපණය කරන බැවිනි.

وَمَا يَنْۢبَغِيْ لِلرَّحْمٰنِ اَنْ يَّتَّخِذَ وَلَدًا ۝٩٣

93. එහෙත් තමා වෙත පුතෙකු ගැනීම මහා කාරුණික වූ (දෙවියන්)ගේ මහානුභාවයට නොගැළපේ.

اِنْ كُلُّ مَنْ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ اِلَّآ اٰتِى الرَّحْمٰنِ عَبْدًا ۝٩٤

94. අහස්හි මෙන්ම පෙළොවෙහි සිටින සියල්ල මහා කාරුණික වූ (දෙවියන්) වෙත දාසයෙකු ලෙසින් පැමිණීම මිස නැත.

لَقَدْ اَحْصٰىهُمْ وَعَدَّهُمْ عَدًّا ۝٩٥

95. ඇත්තෙන්ම ඔහු ඔවුන්ව ග්‍රහණය කර ඔවුන් සියල්ලන්වම සම්පූර්ණයෙන්ම ගණන් ගෙන ඇත්තේය.

وَكُلُّهُمْ اٰتِيْهِ يَوْمَ الْقِيٰمَةِ فَرْدًا ۝٩٦

96. තවද පුනරුත්ථාන දිනයේදී ඔවුන්ගෙන් සෑම කෙනෙකුම ඔහු වෙත තනිවම පැමිණෙන්නෝය.

97. විශ්වාස කොට යහපත් ක්‍රියාවන්හි යෙදෙන අය ගත්කල ඔවුන්ගේ (හදවත් තුල) මහා කාරුණික වූ (දෙවියන්) ස්නේහය ඇති කරන්නේය.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ سَيَجْعَلُ لَهُمُ الرَّحْمٰنُ وُدًّا ﴿٩٧﴾

98. ඒනිසා ඔබ මෙමගින් බියබැතිමතුන්ට සුභාරංචි දෙනු පිණිසද, එමෙන්ම විවාදශීලි ජනයාට මෙමගින් අවවාද කරනු පිණිසද, අපි මෙය (කුර්ආනය) ඔබගේ බසින්ම සරල කර ඇත්තෙමු.

فَاِنَّمَا يَسَّرْنٰهُ بِلِسَانِكَ لِتُبَشِّرَ بِهِ الْمُتَّقِيْنَ وَتُنْذِرَ بِهٖ قَوْمًا لُّدًّا ﴿٩٨﴾

99. තවද ඔවුන්ට පෙර කොපමණ පරම්පරාවන් අපි විනාශ කර ඇත්තෙමුද? ඔවුන්ගෙන් එකෙකුවත් ඔබට දැක ගත හැකිද? නැතහොත් ඔවුන්ගේ හීන් හඬක්(වත්) ඔබට ඇසිය හැකිද?

وَكَمْ اَهْلَكْنَا قَبْلَهُمْ مِّنْ قَرْنٍ هَلْ تُحِسُّ مِنْهُمْ مِّنْ اَحَدٍ اَوْ تَسْمَعُ لَهُمْ رِكْزًا ﴿٩٩﴾




තාහා

(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

طٰهٰ ۚ ②

2. තා හා◆.

مَاۤ اَنۡزَلۡنَا عَلَيۡكَ الۡقُرۡاٰنَ لِتَشۡقٰٓى ۙ ③

3. ඔබ පීඩාවට පත්වනු පිණිස අපි ඔබ වෙත කුර්ආනය පහළ නොකළෙමු.

اِلَّا تَذۡكِرَةً لِّمَنۡ يَّخۡشٰى ۙ ④

4. නමුත් (මෙය දෙවියන් කෙරෙහි) බිය දක්වන්නාට අනුශාසනාවක් ලෙසය.

تَنۡزِيۡلًا مِّمَّنۡ خَلَقَ الۡاَرۡضَ وَالسَّمٰوٰتِ الۡعُلَى ؕ ⑤

5. (එමෙන්ම) පොළොවද උස්වූ අහස්ද මැවූ ඔහු වෙතින් (කුර්ආනය) පහළ කරන ලද්දකි.

اَلرَّحۡمٰنُ عَلَى الۡعَرۡشِ اسۡتَوٰى ⑥

6. සිංහාසනයෙහි තමාව ස්ථාපිත කරගත් (ඔහු) මහා කාරුණික වූ (දෙවියන්)ය.

لَهٗ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الۡاَرۡضِ وَمَا بَيۡنَهُمَا وَمَا تَحۡتَ الثَّرٰى ⑦

7. අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද ඒ දෙක අතර ඇති සියළු දේද පොළෝ පතුලෙහිම ඇති සියළු දේද ඔහුට අයත්ය.

وَاِنۡ تَجۡهَرۡ بِالۡقَوۡلِ فَاِنَّهٗ يَعۡلَمُ السِّرَّ وَاَخۡفٰى ⑧

8. තවද ඔබ උස්හඬින් කථා කළද (එහි වෙනසක් ඇති නොවේ.) නියතවශයෙන්ම රහස් (සිතුවිලි) මෙන්ම වඩා සැඟවුනු දේ (පවා) ඔහු දනී.

اَللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ ؕ لَهُ الۡاَسۡمَآءُ الۡحُسۡنٰى ⑨

9. අල්ලාහ්, ඔහු හැර නැමදීමට සුදුස්සා අන්කිසිවෙක් නැත. ඉතාමත් අලංකාර නාමයන් ඔහුටමය.

وَهَلۡ اَتٰٮكَ حَدِيۡثُ مُوۡسٰى ۘ ⑩

وقف لازم

10. තවද මූසාගේ වෘතාන්තය ඔබ වෙත පැමිණියේද?

◆ ඕ පරිශුද්ධ මෙන්ම පරිපූර්ණ මග පෙන්වන්නාණෙනි!

11. ඔහු ගින්නක් දුටු කල්හි ඔහු තම පවුලේ අයට, 'ඔබලා නතරවෙන්න. මා ගින්නක් දුටුවෙමි. මම එයින් ඔබලාට ගිනිපෙනෙල්ලක් ගෙන එන්නට හෝ මාහට එම ගින්නෙන් මගපෙන්වීම ලබාගන්නට හෝ පුළුවන් වේ' යැයි කීවේය.

إِذْ رَأَىٰ نَارًا فَقَالَ لِأَهْلِهِ امْكُثُوا إِنِّي آنَسْتُ نَارًا لَّعَلِّي آتِيكُم مِّنْهَا بِقَبَسٍ أَوْ أَجِدُ عَلَى النَّارِ هُدًى ١١

12. තවද ඔහු එය කරා ලඟා වූ කල්හි 'එම්බල මූසා' යැයි අමතනු ලැබීය.

فَلَمَّا أَتَاهَا نُودِيَ يَا مُوسَىٰ ١٢

13. 'සැබැවින්ම මම ඔබගේ අධිපතියාණන් වෙමි. එබැවින් ඔබගේ පාවහන් දෙක ගලවන්න. නියතවශයෙන්ම ඔබ සිටින්නේ ශුද්ධවූ තුවා (නැමැති) නිම්නයෙහිය'.

إِنِّي أَنَا رَبُّكَ فَاخْلَعْ نَعْلَيْكَ ۖ إِنَّكَ بِالْوَادِ الْمُقَدَّسِ طُوًى ١٣

14. 'තවද මම ඔබව තෝරා ගතිමි. එමනිසා අනාවරණය කරනු ලබන දෙයට සවන් දෙන්න'.

وَأَنَا اخْتَرْتُكَ فَاسْتَمِعْ لِمَا يُوحَىٰ ١٤

15. 'සැබැවින්ම මම අල්ලාහ් වෙමි. නැමදීමට සුදුස්සා මා හැර අන් කිසිවෙක් නොමැත. එමනිසා මා හට නමදින්න. මා සිහිගන්වනු පිණිස නමස්කාරය ඉටුකරන්න'.

إِنَّنِي أَنَا اللَّهُ لَا إِلَٰهَ إِلَّا أَنَا فَاعْبُدْنِي وَأَقِمِ الصَّلَاةَ لِذِكْرِي ١٥

16. 'නියතවශයෙන්ම එම හෝරාව පැමිණෙනු ඇත. සෑම ආත්මයකටම ඒවායේ ප්‍රයත්නයට අනුව ඵලවිපාක දෙනු ලබනු පිණිස මම එය හෙළිදරව් කරන්නෙමි'.

إِنَّ السَّاعَةَ آتِيَةٌ أَكَادُ أُخْفِيهَا لِتُجْزَىٰ كُلُّ نَفْسٍ بِمَا تَسْعَىٰ ١٦

17. 'එබැවින් එය විශ්වාස නොකර තම දුෂ්ඨ ආශාවන් අනුගමනය කරන අය ඔබව එයින්(ඒ කෙරෙහි විශ්වාස කිරීමෙන්) නොවළක්වත්වා. නැතහොත් ඔබ විනාශ වනු ඇත'.

فَلَا يَصُدَّنَّكَ عَنْهَا مَن لَّا يُؤْمِنُ بِهَا وَاتَّبَعَ هَوَاهُ فَتَرْدَىٰ ١٧

18. 'තවද එම්බල මූසා! ඔබගේ දකුණතෙහි ඇත්තේ කුමක්ද?'

وَمَا تِلْكَ بِيَمِينِكَ يَا مُوسَىٰ ١٨

19. ඔහු, 'මෙය මාගේ සැරයටියයි. මම එය ආධාර කරගනිමි. තවද මාගේ බැටළුවන්ට එමගින් කොළ හලන්නෙමි. එමෙන්ම එයින් මා හට තවත් ප්‍රයෝජන(ද) ඇතැ'යි පිළිතුරු දුන්නේය.

قَالَ هِيَ عَصَايَ أَتَوَكَّأُ عَلَيْهَا وَأَهُشُّ بِهَا عَلَىٰ غَنَمِي وَلِيَ فِيهَا مَآرِبُ أُخْرَىٰ ١٩

20. 'එම්බල මූසා එය බිම විසිකරන්නැ'යි ඔහු කීවේය.

قَالَ اَلْقِهَا يٰمُوْسٰى ﴿٢٠﴾

21. එවිට ඔහු එය බිම විසිකළේය. එසැනින්ම එය දුව යන සර්පයෙකු විය.

فَاَلْقٰىهَا فَاِذَا هِيَ حَيَّةٌ تَسْعٰى ﴿٢١﴾

22. 'එය අල්ලා ගන්න, තවද බිය නොවන්න. අපි එය එහි පෙර තත්ත්වයටම පත්කරන්නෙමු'යි (දෙවියන්) පැවසුවේය.

قَالَ خُذْهَا وَلَا تَخَفْ سَنُعِيْدُهَا سِيْرَتَهَا الْاُوْلٰى ﴿٢٢﴾

23. 'තවද ඔබගේ අත ඔබගේ කිහිල්ලෙහි තද කරන්න. එය කිසිදු කැලලෙන් තොරව සුදු වී එළියට එන්නේය. (මෙය) තවත් සළකුණකි'.

وَاضْمُمْ يَدَكَ اِلٰى جَنَاحِكَ تَخْرُجْ بَيْضَآءَ مِنْ غَيْرِ سُوْٓءٍ اٰيَةً اُخْرٰى ﴿٢٣﴾

24. 'අප ඔබට පෙන්වනු පිණිස අපගේ මහත්වූ සළකුණුවලින් සමහරක්ය'.

لِنُرِيَكَ مِنْ اٰيٰتِنَا الْكُبْرٰى ﴿٢٤﴾

25. 'ඔබ ෆිර්අවුන් වෙත යන්න. ඇත්තෙන්ම ඔහු (සියළු) සීමාවන් ඉක්මවා ඇත්තේය'.

اِذْهَبْ اِلٰى فِرْعَوْنَ اِنَّهٗ طَغٰى ﴿٢٥﴾

26. 'මාගේ අධිපතියාණෙනි! මාගේ හදවත මා වෙනුවෙන් විවෘත කරනු මැනවැ'යි ඔහු කීවේය.

قَالَ رَبِّ اشْرَحْ لِيْ صَدْرِيْ ﴿٢٦﴾

27. 'තවද මාගේ කාර්යය මාහට පහසු කරනු මැනව'.

وَيَسِّرْ لِيْٓ اَمْرِيْ ﴿٢٧﴾

28. 'තවද මාගේ දිවෙහි පැටලිල්ල ලිහිල් කරනු මැනව'.

وَاحْلُلْ عُقْدَةً مِّنْ لِّسَانِيْ ﴿٢٨﴾

29. 'එය මාගේ කතාව ඔවුන් වටහාගනු පිණිසය'.

يَفْقَهُوْا قَوْلِيْ ﴿٢٩﴾

30. 'තවද මාගේ පවුලෙන් උදව්කරුවකු මට ලබා දෙනු මැනව'-

وَاجْعَلْ لِّيْ وَزِيْرًا مِّنْ اَهْلِيْ ﴿٣٠﴾

31. 'මාගේ සොහොයුරු හාරූන්ව'.

هٰرُوْنَ اَخِي ﴿٣١﴾

32. 'ඔහු මගින් මාගේ ශක්තියට අනුබලයක් ලබා දෙනු මැනව'.

اشْدُدْ بِهٖٓ اَزْرِيْ ﴿٣٢﴾

33. 'තවද ඔහුව මාගේ කාර්යයෙහි හවුල්වීමට සලස්වනු මැනව'.

وَاَشْرِكْهُ فِيْٓ اَمْرِيْ ﴿٣٣﴾

كَيْ نُسَبِّحَكَ كَثِيرًا ﴿٣٤﴾

34. 'එය අපි ඔබව වැඩි වැඩියෙන් සුවිශුද්ධ කරනු පිණිසය'.

وَنَذْكُرَكَ كَثِيرًا ﴿٣٥﴾

35. 'තවද (අපි) ඔබව වැඩි වැඩියෙන් සිහි කරනු පිණිසය'.

إِنَّكَ كُنتَ بِنَا بَصِيرًا ﴿٣٦﴾

36. 'නියතවශයෙන්ම අප ගැන සම්පූර්ණ දැනුම ඇත්තේ ඔබටය'.

قَالَ قَدْ أُوتِيتَ سُؤْلَكَ يَٰمُوسَىٰ ﴿٣٧﴾

37. (දෙවියන්), "'එම්බල මූසා! ඔබගේ අයැදීම දෙනු ලැබීය'යි කීවේය".

وَلَقَدْ مَنَنَّا عَلَيْكَ مَرَّةً أُخْرَىٰٓ ﴿٣٨﴾

38. "තවද ඇත්තෙන්ම වෙනත් අවස්ථාවකදී(ද) අපි ඔබට අපගේ අනුග්‍රහය ප්‍රදානය කළෙමු".

إِذْ أَوْحَيْنَآ إِلَىٰٓ أُمِّكَ مَا يُوحَىٰٓ ﴿٣٩﴾

39. "අපි ඔබගේ මව වෙත අනාවරණය කළ විට එම කරන ලද අනාවරණය කෙතරම් (වැදගත්)ද! (එය මෙසේය)"

أَنِ اقْذِفِيهِ فِى التَّابُوتِ فَاقْذِفِيهِ فِى الْيَمِّ فَلْيُلْقِهِ الْيَمُّ بِالسَّاحِلِ يَأْخُذْهُ عَدُوٌّ لِّى وَعَدُوٌّ لَّهُۥ ۚ وَأَلْقَيْتُ عَلَيْكَ مَحَبَّةً مِّنِّى ۚ وَلِتُصْنَعَ عَلَىٰ عَيْنِىٓ ﴿٤٠﴾

40. " 'ඔහුව පෙට්ටගම තුළ දමන්න. පසුව එය ගඟට දමන්න. පසුව ගඟ එය ඉවුර වෙතට ගෙන යනු ඇත. (තවද) මාගේ සතුරා හා ඔහුගේ සතුරා (වන කෙනෙක්) ඔහුව ගනු ඇත'. තවද මම මාගේ ස්නේහයෙන් ඔබව වෙළාගත්තෙමි. තවද (මා එසේ කළේ) ඔබ මාගේ නෙත් හමුවේ හැදී වැඩෙනු පිණිසය".

إِذْ تَمْشِىٓ أُخْتُكَ فَتَقُولُ هَلْ أَدُلُّكُمْ عَلَىٰ مَن يَكْفُلُهُۥ ۖ فَرَجَعْنَٰكَ إِلَىٰٓ أُمِّكَ كَىْ تَقَرَّ عَيْنُهَا وَلَا تَحْزَنَ ۚ وَقَتَلْتَ نَفْسًا فَنَجَّيْنَٰكَ مِنَ الْغَمِّ وَفَتَنَّٰكَ فُتُونًا ۚ فَلَبِثْتَ سِنِينَ فِىٓ أَهْلِ مَدْيَنَ ثُمَّ جِئْتَ عَلَىٰ قَدَرٍ يَٰمُوسَىٰ ﴿٤١﴾

41. "ඔබගේ සහෝදරිය ඇවිද ගිය කල්හි 'මොහුව භාර ගන්නා කෙනෙකු ගැන මා නුඹලාට පෙන්වන්නදැ?'යි කීවාය. එබැවින් ඇයගේ දෑස් සිසිල් වනු පිණිසද, ඇය ශෝකයට පත්නොවනු පිණිසද අපි ඔබව ඔබගේ මව වෙත ආපසු ගෙන දුන්නෙමු. තවද ඔබ මිනිසෙකුව ඝාතනය කළෙහිය. නමුත් අපි ඔබව දුකෙන් මුදවා ගත්තෙමු. පසුව අපි ඔබව නොයෙක් ආකාරයෙන් පිරික්සුවෙමු. තවද ඔබ මද්යන්හි ජනතාව අතර වසර කිහිපයක් ගත කළෙහිය. පසුව එම්බල මූසා ඔබ (නබිත්වය සඳහා) සුදුසු තත්ත්වයකට පැමිණියේය".

وَاصْطَنَعْتُكَ لِنَفْسِيْ ۚ ﴿٤٢﴾

42. “තවද මා ඔබව මා වෙනුවෙන් තෝරා ගත්තෙමි”.

اِذْهَبْ اَنْتَ وَاَخُوْكَ بِاٰيٰتِيْ وَلَا تَنِيَا فِيْ ذِكْرِيْ ۚ ﴿٤٣﴾

43. “ඔබත් ඔබගේ සොහොයුරාත් මාගේ සළකුණු සමග යනු. තවද මා සිහි කිරීමෙහි නොසැලකිලිමත් නොවනු”.

اِذْهَبَآ اِلٰى فِرْعَوْنَ اِنَّهٗ طَغٰى ۚ ﴿٤٤﴾

44. “ඔබ දෙදෙනා ෆිර්අවුන් වෙත යනු. මන්දයත් ඔහු (සියළු) සීමාවන් ඉක්මවා ගොස් ඇත”.

فَقُوْلَا لَهٗ قَوْلًا لَّيِّنًا لَّعَلَّهٗ يَتَذَكَّرُ اَوْ يَخْشٰى ﴿٤٥﴾

45. “තවද ඔබ දෙදෙනා ඔහුට මෘදු වදනින් අමතන්න. මෙමගින් ඔහු වටහාගන්නට හෝ බියවන්නට ඉඩ ඇත”.

قَالَا رَبَّنَآ اِنَّنَا نَخَافُ اَنْ يَّفْرُطَ عَلَيْنَآ اَوْ اَنْ يَّطْغٰى ﴿٤٦﴾

46. ඔවුන් (දෙදෙනා), ‘අප අධිපතියාණෙනි, ඔහු අපට එරෙහිව වධහිංසා කරන්නට හෝ (සියළු) සීමාවන් ඉක්මවා අපරාධ කරන්නට හෝ ඉඩ ඇතැයි අපි බිය වන්නෙමු’යි පිළිතුරු දුන්නෝය.

قَالَ لَا تَخَافَآ اِنَّنِيْ مَعَكُمَآ اَسْمَعُ وَاَرٰى ﴿٤٧﴾

47. (දෙවියන්), “නුඹලා දෙදෙනා බිය නොවනු. නියතවශයෙන්ම මා නුඹලා දෙදෙනා සමග සිටිමි. මම අසන්නෙමි, තවද මම දකින්නෙමි”යි කීවේය.

فَاْتِيٰهُ فَقُوْلَآ اِنَّا رَسُوْلَا رَبِّكَ فَاَرْسِلْ مَعَنَا بَنِيْٓ اِسْرَآءِيْلَ ۙ وَلَا تُعَذِّبْهُمْ ؕ قَدْ جِئْنٰكَ بِاٰيَةٍ مِّنْ رَّبِّكَ ؕ وَالسَّلٰمُ عَلٰى مَنِ اتَّبَعَ الْهُدٰى ﴿٤٨﴾

48. “එබැවින් ඔබ දෙදෙනා ඔහු වෙත ගොස් (මෙසේ) පවසන්න. ‘අපි නුඹගේ අධිපතියාණන්ගේ දූතයින් දෙදෙනෙක් වෙමු. එම නිසා ඉස්රාඊලයේ දරුවන්ව අප සමග එවනු. තවද ඔවුන්ට හිංසා නොකරනු. ඇත්තෙන්ම අපි නුඹගේ අධිපතියාණන්ගෙන් නුඹ වෙත සළකුණක් ගෙන ආවෙමු. තවද යහමග අනුගමනය කරන අය කෙරෙහි සාමය අත්වන්නේය’ ”.

اِنَّا قَدْ اُوْحِيَ اِلَيْنَآ اَنَّ الْعَذَابَ عَلٰى مَنْ كَذَّبَ وَتَوَلّٰى ﴿٤٩﴾

49. “ප්‍රතික්ෂේප කර පිටුපෑ අය කෙරෙහි දඬුවම පැමිණෙන්නේ යැයි ඇත්තෙන්ම අපට අනාවරණය කරන ලදී”.

| | |
|---|---|
| 50. ෆිර්අවුන්, 'එසේනම් එම්බල මූසා, ඔබ දෙදෙනාගේ අධිපතියාණන් කවුරුන්ද,'යි ඇසීය. | قَالَ فَمَنْ رَّبُّكُمَا يٰمُوْسٰى ﴿٥٠﴾ |
| 51. ඔහු(මූසා) 'අපගේ අධිපතියාණන් වන ඔහු සියළු දෙයට එහි (නියම) ස්වරූපය දී පසුව (එය නියමාකාරව ක්‍රියා කිරීමට) මගපෙන්වීයැ'යි කීවේය. | قَالَ رَبُّنَا الَّذِيْٓ اَعْطٰى كُلَّ شَيْءٍ خَلْقَهٗ ثُمَّ هَدٰى ﴿٥١﴾ |
| 52. 'එසේනම්, පෙර වූ පරම්පරාවන්ගේ තත්ත්වය කෙසේ වීද,?'යි (ෆිර්අවුන්) ඇසීය. | قَالَ فَمَا بَالُ الْقُرُوْنِ الْاُوْلٰى ﴿٥٢﴾ |
| 53. ඔහු(මූසා) 'ඔවුන් පිළිබඳව දැනුම මාගේ අධිපතියාණන් වෙත පුස්තකයෙහි (සටහන්වී) ඇත. මාගේ අධිපතියාණන්ට නොවරදින්නේය. අමතකද නොවන්නේයැ'යි කීවේය. | قَالَ عِلْمُهَا عِنْدَ رَبِّيْ فِيْ كِتٰبٍ ۚ لَا يَضِلُّ رَبِّيْ وَلَا يَنْسَى ﴿٥٣﴾ |
| 54. නුඹලාට පොළොව යහනක් කළේද, තවද නුඹලාට ගමන් කිරීම සඳහා එහි මාර්ගයන් ඇති කළේද, තවද අහසින් ජලය පහළ කළේද ඔහුමය. පසුව අපි එමගින් විවිධ ගස් කොළන් ජෝඩු වශයෙන් බිහි කළෙමු. | الَّذِيْ جَعَلَ لَكُمُ الْاَرْضَ مَهْدًا وَّسَلَكَ لَكُمْ فِيْهَا سُبُلًا وَّاَنْزَلَ مِنَ السَّمَآءِ مَآءً ۗ فَاَخْرَجْنَا بِهٖٓ اَزْوَاجًا مِّنْ نَّبَاتٍ شَتّٰى ﴿٥٤﴾ |
| 55. නුඹලා අනුභව කරනු. තවද නුඹලාගේ ගවසතුන්ට තණ කවනු. ඇත්තෙන්ම අවබෝධය ඇති අයට මෙහි සළකුණු ඇත. | كُلُوْا وَارْعَوْا اَنْعَامَكُمْ ۗ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّاُولِى النُّهٰى ﴿٥٥﴾ |
| 56. මෙහිම අපි නුඹලාව මවා ඇත්තෙමු. තවද මෙහිම අපි නුඹලාව ආපසු යැමට සලස්වන්නෙමු. තවද අපි මෙහි සිටම යළිත් වරක් නුඹලාව පිට කරන්නෙමු. | مِنْهَا خَلَقْنٰكُمْ وَفِيْهَا نُعِيْدُكُمْ وَمِنْهَا نُخْرِجُكُمْ تَارَةً اُخْرٰى ﴿٥٦﴾ |
| 57. එමෙන්ම අපි ඔහුට(ෆිර්අවුන්ට) අපගේ සියළු සළකුණු පෙන්වූයෙමු. නමුත් ඔහු (ඒවා) බොරු කළේය. තවද (විශ්වාස කිරීම) ප්‍රතික්ෂේප කළේය. | وَلَقَدْ اَرَيْنٰهُ اٰيٰتِنَا كُلَّهَا فَكَذَّبَ وَاَبٰى ﴿٥٧﴾ |

قَالَ أَجِئْتَنَا لِتُخْرِجَنَا مِنْ أَرْضِنَا بِسِحْرِكَ يَٰمُوسَىٰ ﴿٥٨﴾

58. 'එම්බල මූසා, ඔබගේ මායාවෙන් අපගේ දේශයෙන් අපව පලවා හරින්නට ඔබ අප වෙත පැමිණියේද?'යි ඔහු කීවේය.

فَلَنَأْتِيَنَّكَ بِسِحْرٍ مِّثْلِهِۦ فَٱجْعَلْ بَيْنَنَا وَبَيْنَكَ مَوْعِدًا لَّا نُخْلِفُهُۥ نَحْنُ وَلَآ أَنتَ مَكَانًا سُوًى ﴿٥٩﴾

59. 'එහෙත් අපි එවන් මායාවක් සහතිකලෙසම ඔබ වෙත ගෙන එන්නෙමු. එබැවින් අප හා ඔබ අතර පොරොන්දු වූ දිනය හා ස්ථානය නියම කරන්න. එය අප පැහැර නොහරින්නෙමු. ඔබද (පැහැර නොහැරිය යුතුය). එය (අප දෙදෙනාටම) සරිලන ස්ථානයක් විය යුතුය'.

قَالَ مَوْعِدُكُمْ يَوْمُ ٱلزِّينَةِ وَأَن يُحْشَرَ ٱلنَّاسُ ضُحًى ﴿٦٠﴾

60. 'නුඹලා වෙනුවෙන් නියමිත දිනය උත්සව දිනයක් විය යුතුය. තවද ඉර තරමක් නැගෙන විට ජනතාව එක්රැස් විය යුතුයැ'යි (මූසා) කීවේය.

فَتَوَلَّىٰ فِرْعَوْنُ فَجَمَعَ كَيْدَهُۥ ثُمَّ أَتَىٰ ﴿٦١﴾

61 පසුව ෆිර්අවුන් ආපසු ගොස් ඔහුගේ සියළු උපායන් රැස්කර (පොරොන්දුව ඉටුකිරීමට) ආපසු පැමිණියේය.

قَالَ لَهُم مُّوسَىٰ وَيْلَكُمْ لَا تَفْتَرُوا۟ عَلَى ٱللَّهِ كَذِبًا فَيُسْحِتَكُم بِعَذَابٍ وَقَدْ خَابَ مَنِ ٱفْتَرَىٰ ﴿٦٢﴾

62. මූසා ඔවුනට, 'නුඹලාට විනාශයයි! අල්ලාහ්ට එරෙහිව බොරු නොගොතනු. එසේ වුවහොත් ඔහු නුඹලාව යම්කිසි දඬුවමකින් විනාශ කරනු ඇත. තවද නියතවශයෙන්ම බොරු ගොතන්නා පරාජයට පත්වනු ඇතැ'යි පැවසුවේය.

فَتَنَٰزَعُوٓا۟ أَمْرَهُم بَيْنَهُمْ وَأَسَرُّوا۟ ٱلنَّجْوَىٰ ﴿٦٣﴾

63. පසුව ඔවුහු තමන් අතර ඔවුන්ගේ කාර්යය පිළිබඳව විවාද කරමින් රහසිගතව සාකච්ඡා කළහ.

قَالُوٓا۟ إِنْ هَٰذَٰنِ لَسَٰحِرَٰنِ يُرِيدَانِ أَن يُخْرِجَاكُم مِّنْ أَرْضِكُم بِسِحْرِهِمَا وَيَذْهَبَا بِطَرِيقَتِكُمُ ٱلْمُثْلَىٰ ﴿٦٤﴾

64. 'නියතවශයෙන්ම මේ දෙදෙනා මායාකරුවන්ය. ඔවුන්ගේ මායා බලයෙන් ඔවුන් නුඹලාව නුඹලාගේ දේශයෙන් පලවා හරින්නටද නුඹලාගේ විශිෂ්ඨ සම්ප්‍රදායන් විනාශ කරන්නටද කැමති වන්නෝයැ'යි ඔවුහු කීහ.

فَأَجْمِعُوا كَيْدَكُمْ ثُمَّ ائْتُوا صَفًّا ۚ وَقَدْ أَفْلَحَ الْيَوْمَ مَنِ اسْتَعْلَىٰ ﴿٦٥﴾

65. 'එබැවින් නුඹලාගේ සැලැස්ම ඒකරාශි කරගනු. පසුව පෙළගැසී ඉදිරියට එනු. තවද නියතවශයෙන්ම මෙදින උසස් තැන හිමිකරගන්නා ජයග්‍රාහී වන්නේය'.

قَالُوا يَا مُوسَىٰ إِمَّا أَنْ تُلْقِيَ وَإِمَّا أَنْ نَكُونَ أَوَّلَ مَنْ أَلْقَىٰ ﴿٦٦﴾

66. 'එම්බල මූසා, ඔබ (මුලින්) විසිකරන්න නැතහොත් අප මුලින් විසිකරන්නදැ'යි ඔවුහු ඇසූහ.

قَالَ بَلْ أَلْقُوا ۖ فَإِذَا حِبَالُهُمْ وَعِصِيُّهُمْ يُخَيَّلُ إِلَيْهِ مِنْ سِحْرِهِمْ أَنَّهَا تَسْعَىٰ ﴿٦٧﴾

67. 'නොඑසේය, නුඹලා විසිකරනු'යි ඔහු කිවේය. එසැනින්ම ඔවුන්ගේ කඹද ඔවුන්ගේ සැරයටිද ඔවුන්ගේ මායා බලයෙන් ඒවා (එහා මෙහා) දුවන්නාක් මෙන් ඔහුට පෙනුණි.

فَأَوْجَسَ فِي نَفْسِهِ خِيفَةً مُوسَىٰ ﴿٦٨﴾

68. තවද මූසාට ඔහුගේ සිත්තුළ බියක් දැනුණේය.

قُلْنَا لَا تَخَفْ إِنَّكَ أَنْتَ الْأَعْلَىٰ ﴿٦٩﴾

69. 'බිය නොවන්න. ඇත්තෙන්ම ඔබම ජය ලබන්නේයැ'යි අපි කීවෙමු.

وَأَلْقِ مَا فِي يَمِينِكَ تَلْقَفْ مَا صَنَعُوا ۖ إِنَّمَا صَنَعُوا كَيْدُ سَاحِرٍ ۖ وَلَا يُفْلِحُ السَّاحِرُ حَيْثُ أَتَىٰ ﴿٧٠﴾

70. 'තවද ඔබගේ දකුණතෙහි ඇති දේ විසි කරන්න. එය ඔවුන් මවා පෑ දේ ගිල දමනු ඇත. ඔවුන් මවා පෑ දේ මායාකරුවෙකුගේ උපායක් පමණි. එමෙන්ම මායාකරුවා කොහේ සිට පැමිණියත් ඔහු ජය නොගන්නේමය'.

فَأُلْقِيَ السَّحَرَةُ سُجَّدًا قَالُوا آمَنَّا بِرَبِّ هَارُونَ وَمُوسَىٰ ﴿٧١﴾

71. පසුව මායාකරුවන් අවනතව දණින් වැටීමට සලස්වන ලදී. 'අපි හාරූන් සහ මූසාගේ අධිපතියාණන් කෙරෙහි විශ්වාස කරමු'යි ඔවුහු කීවෝය.

قَالَ آمَنْتُمْ لَهُ قَبْلَ أَنْ آذَنَ لَكُمْ ۖ إِنَّهُ لَكَبِيرُكُمُ الَّذِي عَلَّمَكُمُ السِّحْرَ ۚ

72. 'මම නුඹලාට අවසර දීමටත් පෙර නුඹලා ඔහු කෙරෙහි විශ්වාස කළෙහිද? නියතවශයෙන්ම ඔහු නුඹලාට මායාව උගන්වා ඇති නුඹලාගේ නායකයාමය. එමනිසා

فَلَأُقَطِّعَنَّ أَيْدِيَكُمْ وَأَرْجُلَكُم مِّنْ خِلَافٍ وَّلَأُصَلِّبَنَّكُمْ فِي جُذُوعِ النَّخْلِ وَلَتَعْلَمُنَّ أَيُّنَا أَشَدُّ عَذَابًا وَّأَبْقَىٰ ﴿٧٢﴾

නියතවශයෙන්ම මම නුඹලාගේ අත් සහ නුඹලාගේ පාදයන් ඒකාන්තර පැතිවලට කපා හරින්නෙමි. තවද මම නියතවශයෙන්ම රටඉඳි ගසේ කඳන්හි තබා නුඹලාට කුරුසයේ දඬුවම දෙන්නෙමි. තවද දඬුවම් දීමේදී වඩාත් දැඩි හා වඩාත් ස්ථිර අප අතරින් කවුරුන්දැයි නුඹලා දැනගනු ඇතැ'යි (ෆිර්අවුන්) කීවේය.

قَالُوا لَن نُّؤْثِرَكَ عَلَىٰ مَا جَاءَنَا مِنَ الْبَيِّنَاتِ وَالَّذِي فَطَرَنَا فَاقْضِ مَا أَنتَ قَاضٍ إِنَّمَا تَقْضِي هَٰذِهِ الْحَيَاةَ الدُّنْيَا ﴿٧٣﴾

73. 'අප වෙත පැමිණ ඇති ප්‍රකට සළකුණුවලට වඩා අපි නුඹට ප්‍රමුඛත්වය නොදෙන්නෙමු. එසේම අපව මවා ඇති ඔහුට වඩාද (අපි නුඹට ප්‍රමුඛත්වය නොදෙන්නෙමු.) එමනිසා නුඹ තීන්දු කරන දේ තීන්දු කරනු. නුඹට තීන්දු කළ හැක්කේ මෙලොව ජීවිතය සම්බන්ධව පමණි'යි ඔවුහු කීහ.

إِنَّا آمَنَّا بِرَبِّنَا لِيَغْفِرَ لَنَا خَطَايَانَا وَمَا أَكْرَهْتَنَا عَلَيْهِ مِنَ السِّحْرِ وَاللَّهُ خَيْرٌ وَّأَبْقَىٰ ﴿٧٤﴾

74. නියතවශයෙන්ම අපි අපගේ අධිපතියාණන් කෙරෙහි විශ්වාස කළේ, ඔහු අපගේ පව්වලටද නුඹ අපට බල කළ මායාවටද අපව ක්ෂමා කරනු පිණිස වේ. තවද අල්ලාහ් ශ්‍රේෂ්ඨය. තවද සදාතනිකය.

إِنَّهُ مَن يَأْتِ رَبَّهُ مُجْرِمًا فَإِنَّ لَهُ جَهَنَّمَ لَا يَمُوتُ فِيهَا وَلَا يَحْيَىٰ ﴿٧٥﴾

75. ඇත්තෙන්ම යමෙක් පාපකාරීව ඔහුගේ අධිපතියාණන් වෙත පැමිණෙන්නේද, ඔහුට නිරයම වේ. ඔහු එහි මැරෙන්නේද නැත, ජීවත්වන්නේද නැත.

وَمَن يَأْتِهِ مُؤْمِنًا قَدْ عَمِلَ الصَّالِحَاتِ فَأُولَٰئِكَ لَهُمُ الدَّرَجَاتُ الْعُلَىٰ ﴿٧٦﴾

76. නමුත් යමෙක් යහපත් ක්‍රියාවන් කර විශ්වාසිතව ඔහු වෙත පැමිණෙන්නේද, එවන් අයට අති උසස් තරාතිරම් ඇත.

جَنَّاتُ عَدْنٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا وَذَٰلِكَ جَزَاءُ مَن تَزَكَّىٰ ﴿٧٧﴾ ع

77. පහළින් ගලා බසින ගංගාවලින් යුත් නිත්‍ය උද්‍යානයන්ය. ඔවුහු එහි (සදා) වෙසෙන්නෝය. තවද එය තමන්ව පවිත්‍රව තබාගන්නා අයගේ ඵලවිපාකය වේ.

78. තවද අපි මූසා වෙත, 'මාගේ දාසයින්ව රාත්‍රියේදී රැගෙන යන්න. තවද මුහුද හරහා ඔවුනට වියළි මගක් සාදාගන්න. ලුහු බැඳ අල්ලා ගනු ලබන්නේ යැයි බියක්ද ඔබට නොවනු ඇත. තවද ඔබට (වෙනයම්) බියක්ද නොවනු ඇතැ'යි (පවසමින්) අනාවරණය කළෙමු.

وَلَقَدْ أَوْحَيْنَآ إِلَىٰ مُوسَىٰٓ أَنْ أَسْرِ بِعِبَادِى فَٱضْرِبْ لَهُمْ طَرِيقًا فِى ٱلْبَحْرِ يَبَسًا لَّا تَخَٰفُ دَرَكًا وَلَا تَخْشَىٰ ٧٨

79. පසුව ෆිර්අවුන් සිය සේනාවන් සමග ඔවුන්ව ලුහු බැන්දේය. එවිට මුහුද ඔවුන්ව සහමුලින්ම මුහුදුබත් කළේය.

فَأَتْبَعَهُمْ فِرْعَوْنُ بِجُنُودِهِۦ فَغَشِيَهُم مِّنَ ٱلْيَمِّ مَا غَشِيَهُمْ ٧٩

80. තවද ෆිර්අවුන් ඔහුගේ ජනයාව නොමග යැවීය. තවද ඔවුන්ට යහමග නොපෙන්වීය.

وَأَضَلَّ فِرْعَوْنُ قَوْمَهُۥ وَمَا هَدَىٰ ٨٠

81. 'එම්බල ඉස්රාඊල් දරුවනි! අපි නුඹලාව නුඹලාගේ සතුරාගෙන් මුදවා ගත්තෙමු. තවද අපි කන්දෙහි දකුණු පසින් නුඹලා සමග ගිවිසුමක් ඇති කළෙමු. තවද අපි නුඹලා කෙරෙහි "මන්න" ද "සල්වා" ද පහළ කළෙමු'.

يَٰبَنِىٓ إِسْرَٰٓءِيلَ قَدْ أَنجَيْنَٰكُم مِّنْ عَدُوِّكُمْ وَوَٰعَدْنَٰكُمْ جَانِبَ ٱلطُّورِ ٱلْأَيْمَنَ وَنَزَّلْنَا عَلَيْكُمُ ٱلْمَنَّ وَٱلسَّلْوَىٰ ٨١

82. 'අපි නුඹලාට ලබාදුන් පවිත්‍ර දෙයින් අනුභව කරනු. තවද එහි සීමාව නොඉක්මවනු. එසේ වුවහොත් මාගේ කෝපය නුඹලා වෙත පහළ වනු ඇත. තවද යමෙකු වෙත මාගේ කෝපය පහළ වන්නේද ඔහු විනාශ වනු ඇත'.

كُلُوا۟ مِن طَيِّبَٰتِ مَا رَزَقْنَٰكُمْ وَلَا تَطْغَوْا۟ فِيهِ فَيَحِلَّ عَلَيْكُمْ غَضَبِى ۖ وَمَن يَحْلِلْ عَلَيْهِ غَضَبِى فَقَدْ هَوَىٰ ٨٢

83. 'නමුත් යමෙක් පසුතැවිලි වී විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කර පසුව මගපෙන්වීමෙහි නිරතවන්නේද, නියතවශයෙන්ම මම ඔහුට බෙහෙවින් ක්ෂමාශීලීය'.

وَإِنِّى لَغَفَّارٌ لِّمَن تَابَ وَءَامَنَ وَعَمِلَ صَٰلِحًا ثُمَّ ٱهْتَدَىٰ ٨٣

84. 'තවද එම්බල මූසා, ඔබව ඔබගේ ජනතාවගෙන් ඉවත් වීමට ඉක්මන් කළේ කුමක්ද?'

وَمَآ أَعْجَلَكَ عَن قَوْمِكَ يَٰمُوسَىٰ ٨٤

85. ඔහු(මූසා), 'ඔවුහු මාගේ මාර්ගය ඔස්සේ සමීපවන්නෝය. තවද මාගේ

قَالَ هُمْ أُو۟لَآءِ عَلَىٰٓ أَثَرِى وَعَجِلْتُ

إِلَيْكَ رَبِّ لِتَرْضَىٰ ﴿٨٥﴾

අධිපතියාණෙනි! ඔබ තෘප්තිමත් වනු පිණිස මා ඔබ වෙත කඩිනමින් පැමිණ ඇත්තෙමි'යි පැවසීය.

قَالَ فَإِنَّا قَدْ فَتَنَّا قَوْمَكَ مِنۢ بَعْدِكَ وَأَضَلَّهُمُ ٱلسَّامِرِىُّ ﴿٨٦﴾

86. (දෙවියන්), 'ඔබ නොසිටියදී අපි ඔබගේ ජනතාව පිරික්සුවෙමු. තවද සාමිරී ඔවුන්ව නොමග යවා ඇතැ'යි කිවේය.

فَرَجَعَ مُوسَىٰٓ إِلَىٰ قَوْمِهِۦ غَضْبَٰنَ أَسِفًا ۚ قَالَ يَٰقَوْمِ أَلَمْ يَعِدْكُمْ رَبُّكُمْ وَعْدًا حَسَنًا ۚ أَفَطَالَ عَلَيْكُمُ ٱلْعَهْدُ أَمْ أَرَدتُّمْ أَن يَحِلَّ عَلَيْكُمْ غَضَبٌ مِّن رَّبِّكُمْ فَأَخْلَفْتُم مَّوْعِدِى ﴿٨٧﴾

87. එබැවින් මූසා කෝපයෙන් හා ශෝකයෙන් ඔහුගේ ජනතාව වෙත ආපසු පැමිණියේය. 'මාගේ ජනතාවනි! නුඹලාගේ අධිපතියාණන් වඩා යහපත් පොරොන්දුවක් නුඹලාට නොදුන්නේද? පසුව නියමිත පොරොන්දු කාලය නුඹලාට ඉතා දීර්ඝව පෙනුනේද? නැතහොත්, නුඹලාගේ අධිපතියාණන්ගෙන් කෝපය නුඹලා මත පහළ විය යුතු බවට නුඹලා කැමති වී මා සමග වූ (නුඹලාගේ) පොරොන්දුව නුඹලා කඩ කළාහුදැ?'යි ඔහු කිවේය.

قَالُوا۟ مَآ أَخْلَفْنَا مَوْعِدَكَ بِمَلْكِنَا وَلَٰكِنَّا حُمِّلْنَآ أَوْزَارًا مِّن زِينَةِ ٱلْقَوْمِ فَقَذَفْنَٰهَا فَكَذَٰلِكَ أَلْقَى ٱلسَّامِرِىُّ ﴿٨٨﴾

88. 'අපි අපගේ සිය කැමැත්තෙන්ම ඔබ සමග කළාවූ (අපගේ) පොරොන්දුව කඩ නොකළෙමු. එහෙත් ජනතාවගේ ආභරණ බර වලින් අපි පටවන ලද්දෙමු. තවද අපි ඒවා විසිකළෙමු. එමෙන්ම සාමිරීද උපායක් යෙදුවේ යැ'යි ඔවුහු කීහ.

فَأَخْرَجَ لَهُمْ عِجْلًا جَسَدًا لَّهُۥ خُوَارٌ فَقَالُوا۟ هَٰذَآ إِلَٰهُكُمْ وَإِلَٰهُ مُوسَىٰ فَنَسِىَ ﴿٨٩﴾

89. පසුව ඔහු(සාමිරී) ඔවුනට වසු පැටවෙකු (සාදා) ඉදිරිපත් කළේය. එය තප්පුලන හඬක් නගන (අප්‍රාණික) සිරුරක් පමණි. එවිට (ඔහු සහ ඔහුගේ සගයින්) 'මෙය නුඹලාගේ දෙවියන්ය. තවද මූසාගේද දෙවියන්ය. නමුත් ඔහුට (එය ගැන නුඹලාට කීමට) අමතක වූයේ යැ'යි කීහ.

أَفَلَا يَرَوْنَ أَلَّا يَرْجِعُ إِلَيْهِمْ قَوْلًا وَلَا يَمْلِكُ لَهُمْ ضَرًّا وَلَا نَفْعًا ﴿٩٠﴾

90. එය ඔවුනට කිසිදු ප්‍රතිචාරයක් නොදක්වන බවත් ඔවුනට හානියක් හෝ යහපතක් කිරීමට බලයක් නොමැති බවත් ඔවුනට දැකීමට නොහැකි වූයේද?

91. තවද හාරූන්, 'එම්බල මාගේ ජනතාවනි! එ(වසු පැටවා)මගින් නුඹලාව පිරික්සීමට ලක්කරන ලදී. තවද නියතවශයෙන්ම මහා කාරුණික (දෙවියන්) නුඹලාගේ අධිපතියාණන්මය. එමනිසා මාව අනුගමනය කරනු. තවද මාගේ අණ පිළිපදිනු'යි මෙයට පෙර ඔවුනට පැවසුවේය.

وَلَقَدْ قَالَ لَهُمْ هٰرُونُ مِنْ قَبْلُ يٰقَوْمِ إِنَّمَا فُتِنْتُمْ بِهِ ۚ وَإِنَّ رَبَّكُمُ الرَّحْمٰنُ فَاتَّبِعُونِي وَأَطِيعُوا أَمْرِي ﴿٩١﴾

92. 'මූසා අප වෙත ආපසු පැමිණෙන තෙක් අපි එයට නමස්කාර කිරීම අත් නොහරින්නෙමු'යි ඔවුහු පිළිතුරු දුන්හ.

قَالُوا لَنْ نَبْرَحَ عَلَيْهِ عٰكِفِينَ حَتّٰى يَرْجِعَ إِلَيْنَا مُوسٰى ﴿٩٢﴾

93. 'එම්බල හාරූන්! ඔවුන් නොමග ගිය බව ඔබ දුටු කල්හි ඔබව වැළැක්වූයේ කුමක්ද?'යි (මූසා) ඇසුවේය.

قَالَ يٰهٰرُونُ مَا مَنَعَكَ إِذْ رَأَيْتَهُمْ ضَلُّوا ﴿٩٣﴾

94. 'එනම් මා අනුගමනය නොකරද? එසේනම් ඔබ මාගේ අණට අකීකරු වූයෙහිද?'

أَلَّا تَتَّبِعَنِ ۖ أَفَعَصَيْتَ أَمْرِي ﴿٩٤﴾

*95. "එම්බල මාගේ මවගේ පුත්‍රයාණෙනි! මාගේ රැවුලෙන් හෝ මාගේ හිසෙ(හි කෙස්වලි)න් (මාව) නොඅල්ලන්න. 'ඔබ ඉස්රාඊලයේ දරුවන් අතර භේදයක් ඇති කළේ යැයිද ඔබ මාගේ තීරණයට බලානොසිටියේ යැ'යිද ඔබ කියනු ඇතැයි මා බිය වූයෙමි"යි ඔහු(හාරූන්) පිළිතුරු දුන්නේය.

قَالَ يَبْنَؤُمَّ لَا تَأْخُذْ بِلِحْيَتِي وَلَا بِرَأْسِي ۖ إِنِّي خَشِيتُ أَنْ تَقُولَ فَرَّقْتَ بَيْنَ بَنِي إِسْرَائِيلَ وَلَمْ تَرْقُبْ قَوْلِي ﴿٩٥﴾

96. 'එම්බා සාමිරී! නුඹට කුමක් කීමට ඇත්දැ?'යි ඔහු(මූසා) ඇසුවේය.

قَالَ فَمَا خَطْبُكَ يٰسَامِرِيُّ ﴿٩٦﴾

97. ඔහු(සාමිරී), 'ඔවුන් තේරුම් නොගත් දේ මා තේරුම් ගත්තෙමි. දූතයාගේ ගුණාංගයන්ගෙන් කොටසක් මා ලබාගත්තෙමි. නමුත් (අවස්ථාව ලත් විගස) එය මා අත්හැරියෙමි. මෙයාකාරයට මාගේ සිත මා හට මෙය ප්‍රශංසනීය කළේයැ'යි කීවේය.

قَالَ بَصُرْتُ بِمَا لَمْ يَبْصُرُوا بِهِ فَقَبَضْتُ قَبْضَةً مِنْ أَثَرِ الرَّسُولِ فَنَبَذْتُهَا وَكَذٰلِكَ سَوَّلَتْ لِي نَفْسِي ﴿٩٧﴾

*සටහන. 95: මෙහිදී 'මාගේ රැවුලෙන් හෝ මාගේ හිසෙ(හි කෙස්වලි)න් (මාව) නොඅල්ලන්න' යන පදය වචනානුසාරයෙන් නොගත යුතු අතර එය 'මා නින්දාවට පත් නොකරන්න' යන අර්ථය ගත හැක.

قَالَ فَاذْهَبْ فَإِنَّ لَكَ فِي الْحَيَوٰةِ أَنْ تَقُولَ لَا مِسَاسَ ۖ وَإِنَّ لَكَ مَوْعِدًا لَّنْ تُخْلَفَهُ ۖ وَانْظُرْ إِلَىٰ إِلَٰهِكَ الَّذِي ظَلْتَ عَلَيْهِ عَاكِفًا ۖ لَّنُحَرِّقَنَّهُ ثُمَّ لَنَنْسِفَنَّهُ فِي الْيَمِّ نَسْفًا ﴿٩٨﴾

98. "ඉවත්ව යනු! (නුඹ මෙලොවේ සෑම කෙනෙකුටම මාව) 'නොඅල්ලන්න (එනම් මූසා මා අශුද්ධ යැයි පවසා ඇත)'යැයි නුඹගේ ජීවිතය පුරාම කියාගෙන සිටීම මෙලොවෙදී නුඹට ලැබෙන දඬුවමයි. තවද නුඹට නොවැළැක්විය හැකි (දඬුවම) සඳහා කාලයක් නුඹට නියම කර ඇත. නුඹ වඳිමින් සිටි නුඹගේ දෙවියන් දෙස බලනු! අපි ඇත්තෙන්ම එය පුළුස්සා දමන්නෙමු. පසුව අපි එය මුහුදෙහි විසුරුවා හරින්නෙමු"යි (මූසා) කීවේය.

إِنَّمَا إِلَٰهُكُمُ اللَّهُ الَّذِي لَا إِلَٰهَ إِلَّا هُوَ ۚ وَسِعَ كُلَّ شَيْءٍ عِلْمًا ﴿٩٩﴾

99. නුඹලාගේ දෙවියන් අල්ලාහ්මය. ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නැත. (ඔහුගේ) දැනුමෙන් ඔහු සියල්ල වෙළාගෙන ඇත.

كَذَٰلِكَ نَقُصُّ عَلَيْكَ مِنْ أَنْبَاءِ مَا قَدْ سَبَقَ ۚ وَقَدْ آتَيْنَاكَ مِنْ لَدُنَّا ذِكْرًا ﴿١٠٠﴾

100. මෙලෙස පෙර සිදු වූ දේ පිළිබඳ ආරංචින් අපි ඔබට විස්තර කරන්නෙමු. තවද නියතවශයෙන්ම අපි ඔබට අප වෙතින් අනුශාසනාවක් ලබා දී ඇත්තෙමු.

مَنْ أَعْرَضَ عَنْهُ فَإِنَّهُ يَحْمِلُ يَوْمَ الْقِيَامَةِ وِزْرًا ﴿١٠١﴾

101. කවුරුන් හෝ එයට පිටුපාන්නේද නියතවශයෙන්ම ඔහු පුනරුත්ථාන දිනයේදී (අධික) බරක් උසුලනු ඇත.

خَالِدِينَ فِيهِ ۖ وَسَاءَ لَهُمْ يَوْمَ الْقِيَامَةِ حِمْلًا ﴿١٠٢﴾

102. ඔවුන් එහි වෙසෙන්නෝය. තවද පුනරුත්ථාන දිනයේදී එම බර ඔවුනට නපුරු (පවක්) වනු ඇත.

يَوْمَ يُنْفَخُ فِي الصُّورِ ۚ وَنَحْشُرُ الْمُجْرِمِينَ يَوْمَئِذٍ زُرْقًا ﴿١٠٣﴾

103. සූර් (නළාව) පිඹිනු ලබන එම දින එය වනු ඇත. තවද එම දිනයේදී නිල් ඇස් ඇති පාපකාරීන් සියල්ලව අපි එක්රැස් කරන්නෙමු.

يَتَخَافَتُونَ بَيْنَهُمْ إِنْ لَبِثْتُمْ إِلَّا عَشْرًا ﴿١٠٤﴾

104. ඔවුහු 'අප ගත කළේ (දින) දහයක් පමණක්යැ'යි (පවසමින්) ඔවුන් අතර සිහින් හඬින් කතා කරන්නෝය.

نَحْنُ أَعْلَمُ بِمَا يَقُولُونَ إِذْ يَقُولُ أَمْثَلُهُمْ طَرِيقَةً إِنْ لَبِثْتُمْ إِلَّا يَوْمًا ﴿١٠٥﴾

105. ඔවුන් කියනු ලබන දේ අපි ඉතා මැනැවින් දනිමු. එවිට ඔවුනතර ජීවිතයේ ඉතා හොඳම මාර්ගය හිමි අයෙක් 'නුඹලා ගත කළේ දිනක් පමණක්යැ'යි කියන්නේය.

106. තවද ඔවුහු ඔබගෙන් කඳු ගැන අසන්නෝය. 'මාගේ අධිපතියාණන් ඒවා කැබලි වලට කඩා ඒවා දූවිලි වශයෙන් විසුරුවා හරින්නේයැ'යි පවසන්න.

وَيَسْـَٔلُونَكَ عَنِ ٱلْجِبَالِ فَقُلْ يَنسِفُهَا رَبِّى نَسْفًا ﴿١٠٦﴾

107. තවද ඔහු ඒවා හිස් තැනිතලාවක් කර දමන්නේය.

فَيَذَرُهَا قَاعًا صَفْصَفًا ﴿١٠٧﴾

108. ඒවායෙහි ඔබ ඇදයක් හෝ උස් පහත් බවක් නොදකින්නෙහිය.

لَّا تَرَىٰ فِيهَا عِوَجًا وَلَآ أَمْتًا ﴿١٠٨﴾

109. (අනුශාසනාවෙහි) කිසිදු ඇදයක් නොවන කැඳවුම්කරුවකුව එදින ඔවුහු අනුගමනය කරන්නෝය. තවද සියළු හඬවල් මහා කාරුණික වූ (දෙවියන්) ඉදිරියෙහි යටපත් වනු ඇත. තවද මුමුණන හඬක් මිස කිසිවක් ඔබට නොඇසෙන්නේය.

يَوْمَئِذٍ يَتَّبِعُونَ ٱلدَّاعِىَ لَا عِوَجَ لَهُۥ ۖ وَخَشَعَتِ ٱلْأَصْوَاتُ لِلرَّحْمَٰنِ فَلَا تَسْمَعُ إِلَّا هَمْسًا ﴿١٠٩﴾

110. එදින මහා කාරුණික වූ (දෙවියන්) කවරෙකුට අනුමැතිය දෙන්නේද (එම) තැනැත්තා කවුරුන් වෙනුවෙන් කථා කිරීම ඔහු කැමති වන්නේද (එම) තැනැත්තා හැර (අන්කිසිවෙකුගේ) මැදිහත්වීම ඵල නොදෙන්නේය.

يَوْمَئِذٍ لَّا تَنفَعُ ٱلشَّفَٰعَةُ إِلَّا مَنْ أَذِنَ لَهُ ٱلرَّحْمَٰنُ وَرَضِىَ لَهُۥ قَوْلًا ﴿١١٠﴾

111. ඔවුන්ට ඉදිරියෙන් ඇති (සියළු) දේද ඔවුන්ට පිටු පසින් ඇති (සියළු) දේද ඔහු දනියි. නමුත් (ඔවුන්ගේ) දැනුමෙන් ඔවුනට ඔහුව වෙළා ගත නොහැක.

يَعْلَمُ مَا بَيْنَ أَيْدِيهِمْ وَمَا خَلْفَهُمْ وَلَا يُحِيطُونَ بِهِۦ عِلْمًا ﴿١١١﴾

112. තවද ජීවමාන වූද ස්වයංස්ථායි වූද සියල්ල පැවතීමට සලස්වන්නා වූද (දෙවියන්) ඉදිරියෙහි (සියළු) මුහුණු යටහත් පහත් වනු ඇත. තවද අපරාධයේ (බර) උසුලන්නා සත්තකින්ම පරාජිත වන්නේය.

وَعَنَتِ ٱلْوُجُوهُ لِلْحَىِّ ٱلْقَيُّومِ ۖ وَقَدْ خَابَ مَنْ حَمَلَ ظُلْمًا ﴿١١٢﴾

113. නමුත් යමෙක් යහපත් ක්‍රියාවන් කරමින් තවද ඔහු විශ්වාසිතයෙකු වන්නේද ඔහු අපරාධයකට හෝ පාඩුවකට බිය නොවන්නේය.

وَمَن يَعْمَلْ مِنَ ٱلصَّٰلِحَٰتِ وَهُوَ مُؤْمِنٌ فَلَا يَخَافُ ظُلْمًا وَلَا هَضْمًا ﴿١١٣﴾

114. තවද මෙලෙස අපි මෙය කුර්ආනය ලෙසින් අරාබි (බසින්)

وَكَذَٰلِكَ أَنزَلْنَٰهُ قُرْءَانًا عَرَبِيًّا وَصَرَّفْنَا

فِيهِ مِنَ الْوَعِيدِ لَعَلَّهُمْ يَتَّقُونَ أَوْ يُحْدِثُ لَهُمْ ذِكْرًا ﴿١١٤﴾

පහළ කළෙමු. තවද ඔවුන් දෙවියන්ට බිය බැතිමත් වනු පිණිස හෝ එය ඔවුන්තුල අධ්‍යාත්මික මෙනෙහි කිරීමක් ඇති කරනු පිණිස හෝ අපි එහි ඇතැම් අවවාදයන් විස්තර කර ඇත්තෙමු.

فَتَعَٰلَى اللَّهُ الْمَلِكُ الْحَقُّ ۗ وَلَا تَعْجَلْ بِالْقُرْآنِ مِنْ قَبْلِ أَنْ يُقْضَىٰ إِلَيْكَ وَحْيُهُ ۖ وَقُلْ رَبِّ زِدْنِي عِلْمًا ﴿١١٥﴾

115. එබැවින් සත්‍ය රාජයාණන්වූ අල්ලාහ් අති උතුම්ය. තවද ඔබ කෙරෙහි කුර්ආනයේ එහි අනාවරණය පරිපූර්ණ කරනු ලබන්නට මත්තෙන් ඉක්මන් නොවන්න. එහෙත් 'මාගේ අධිපතියාණෙනි! දැනුමෙහි මා වර්ධනය කරනු මැනවැ'යි පවසන්න.

وَلَقَدْ عَهِدْنَا إِلَىٰ آدَمَ مِنْ قَبْلُ فَنَسِيَ وَلَمْ نَجِدْ لَهُ عَزْمًا ﴿١١٦﴾

116. තවද අපි මීට පෙර ආදම් සමග ගිවිසුමක් ඇති කළෙමු. නමුත් ඔහුට අමතක විය. එමෙන්ම ඔහු තුල (අකීකරු වීමට) කිසිදු අධිෂ්ඨානයක් අපි නොදුටුවෙමු.

وَإِذْ قُلْنَا لِلْمَلَٰٓئِكَةِ اسْجُدُوا لِآدَمَ فَسَجَدُوٓا إِلَّآ إِبْلِيسَ ۖ أَبَىٰ ﴿١١٧﴾

117. තවද 'ආදම්ට අවනත වනු'යි අප සුරදූතයින්ට කියූ කල්හි, ඔවුහු (සියල්ලෝම) අවනත වූහ, එහෙත් ඉබ්ලීස් (එසේ නොකළේය). ඔහු ප්‍රතික්ෂේප කළේය.

فَقُلْنَا يَٰٓـَٔادَمُ إِنَّ هَٰذَا عَدُوٌّ لَّكَ وَلِزَوْجِكَ فَلَا يُخْرِجَنَّكُمَا مِنَ الْجَنَّةِ فَتَشْقَىٰٓ ﴿١١٨﴾

118. පසුව අපි 'එම්බා ආදම්! මොහු ඔබටත් ඔබගේ බිරිඳටත් සතුරෙකි. එමනිසා ඔහු ඔබ දෙදෙනාව උද්‍යානයෙන් පිට නොකරත්වා. එසේ වුවහොත් ඔබ ශෝකයට පත් වනු ඇතැ'යි පැවසුවෙමු.

إِنَّ لَكَ أَلَّا تَجُوعَ فِيهَا وَلَا تَعْرَىٰ ﴿١١٩﴾

119. 'ඔබ එහි කුසගින්නෙන් නොපෙළෙන්නටත් ඔබ නිර්වස්ත්‍රව නොසිටින්නටත් ඔබට (නියම කරනු ලැබ) ඇත'.

وَأَنَّكَ لَا تَظْمَؤُا فِيهَا وَلَا تَضْحَىٰ ﴿١٢٠﴾

120. 'තවද ඔබ එහි පිපාසිත නොවන්නටත් ඔබ අව්වෙහි නොතැවෙන්නටත්ය'.

فَوَسْوَسَ إِلَيْهِ الشَّيْطَٰنُ قَالَ يَٰٓـَٔادَمُ هَلْ

121. නමුත් ෂෙයිතාන් ඔහුට නපුරු අදහස් කෙඳුරුවේය. ඔහු 'එම්බා

اَدُلُّكَ عَلٰى شَجَرَةِ الْخُلْدِ وَمُلْكٍ لَّا يَبْلٰى ﴿١٢٠﴾

ආදම්! නිත්‍යවූ ගස වෙතටත් කිසිවිටෙකත් ගරා නොවැටෙන්නාවූ රාජධානිය වෙතටත් මා ඔබට මග පෙන්වන්නද,?'යි කිවේය.

فَاَكَلَا مِنْهَا فَبَدَتْ لَهُمَا سَوْاٰتُهُمَا وَطَفِقَا يَخْصِفٰنِ عَلَيْهِمَا مِنْ وَّرَقِ الْجَنَّةِ ۚ وَعَصٰۤى اٰدَمُ رَبَّهٗ فَغَوٰى ﴿١٢١﴾

*122. පසුව ඔවුන් දෙදෙනා එයින් අනුභව කළහ. එබැවින් ඔවුන්ගේ සහජ දුර්වලතාවය ඔවුනට හෙළිවිය. එබැවින් ඔවුන් ස්වර්ගයේ පත්‍රවලින් (යහකම් වලින්) ඔවුන්ව ආවරණය කර ගැනීමට පටන් ගත්හ. තවද ආදම් තම අධිපතියාණන්ට අකීකරු විය. එහෙයින් යහ මාර්ගයෙන් බැහැර ගියේය.

ثُمَّ اجْتَبٰهُ رَبُّهٗ فَتَابَ عَلَيْهِ وَهَدٰى ﴿١٢٢﴾

123. පසුව ඔහුගේ අධිපතියාණන් (තම කරුණාව තුළින්) ඔහුව තෝරාගෙන ඔහු වෙත (දයාවෙන් යුතුව) හැරුණේය. තවද (ඔහුට) මග පෙන්විය.

قَالَ اهْبِطَا مِنْهَا جَمِيْعًا بَعْضُكُمْ لِبَعْضٍ عَدُوٌّ ۚ فَاِمَّا يَاْتِيَنَّكُمْ مِّنِّىْ هُدًى ۙ فَمَنِ اتَّبَعَ هُدَاىَ فَلَا يَضِلُّ وَلَا يَشْقٰى ﴿١٢٣﴾

124. 'නුඹලා දෙදෙනා සියල්ලන් එක්ව මෙයින් පිට වනු. නුඹලාගෙන් සමහරෙක් අන් සමහරෙකුට සතුරන් වෙති. තවද මාගෙන් නුඹලාට මග පෙන්වීම පැමිණෙන කල්හි, මාගේ මග පෙන්වීම යමෙක් අනුගමනය කරන්නේද ඔහු නොමග නොයනු ඇත. තවද ඔහු ශෝකයට පත් නොවනු ඇතැ'යි ඔහු(දෙවියන්) කිවේය.

*සටහන. 122: බොහෝ පරිවර්ථකයින් මෙම සිදුවීම් පෙළ වචනානුසාරයෙන් පරිවර්ථනය කරන අතර එසේ වචනානුසාරයෙන් නොගෙන සිටීමට මෙම පාඨයේම සාධක ඇත. මෙහි සඳහන් වන පාපය පැහැදිලිව අභ්‍යන්තර පැටලිල්ලක් වන අතර එහි මෙලෙසද සඳහන් වේ. එනම් 'සව්ආතුහුමා' (දුර්වලතාවය) ඔවුන්ට එළිවිය. එය ශාරීරික නිරුවත්භාවය වූයේ නම් ඔවුන්ගේ නිරුවත ඔවුන් ඉපදුනු අවධියේ සිට මෙතෙක් මෙම සිදුවීම වනතුරු කෙසේ නොදැන සිටියේද?

එමනිසා මෙම වචනානුසාර අර්ථකතනය වැරදි සහගතව කුර්ආනයට ඇඳා ඇති බව මෙයින් තහවුරු වේ. 'සව්ආ' යන වදන මූලිකව ලැජ්ජාවට හේතු වන ක්‍රියා හා දුෂ්ඨ නැඹුරුවීම් වලට යෙදේ. වැරදි කරන අවස්ථාවේදී වැරදි කරන්නාට ඔහුගේම සැඟවුනු දුර්වලතාවයන් දිස්වේ. මෙම දුර්වලතාවයන් මානසික මෙන්ම අභ්‍යන්තර ඒවා වන අතර මනසට සහ හදවතට සම්බන්ධ නිසා කෙනෙකුගේ ශරීරය පත්‍රවලින් ආවරණය කිරීමෙන් මේවා සැඟවීමට හෝ වැසීමට නොහැක. එමනිසා මෙම වැරදි වැටහිම නිවැරදි කිරීම පිණිස, ආදම් සහ හව්වා කුමන විදියේ වරදක් කළද 'ආවරණය කිරීම' යනුවෙන් මෙහිදී දැක්වෙන්නේ අල්ලාහ්ගෙන් ක්ෂමාව සහ ආරක්ෂාව පැතීම වේ. එසේම ස්වර්ගයේ පත්‍ර යන්නෙහි උපමානුසාරයෙන් තේරුම් ගත යුත්තේ ක්ෂමාව අයැදීම මගින් අල්ලාහ්ගේ රැකවරණය ලබා ගැනීමයි. කුර්ආනය පවසන ආකාරයට ආදම් කළේද මෙයයි. තවද කුර්ආනයෙහි පැහැදිලිව සඳහන්වන පරිදි දෙවියන් තමන් විසින්ම ආදම්ට ඔහුගේ වරදෙහි ප්‍රතිවිපාක වලින් මිදෙන්නට වදන් ඉගැන්වූ අතර මෙම වදන්වලට ප්‍රතිචාරයක් වශයෙන් දෙවියන් ආදම් වෙත කරුණාව හා ක්ෂමාව දැක්විය.

وَمَنْ أَعْرَضَ عَن ذِكْرِي فَإِنَّ لَهُ مَعِيشَةً ضَنكًا وَنَحْشُرُهُ يَوْمَ الْقِيَامَةِ أَعْمَىٰ ﴿١٢٥﴾

125. 'නමුත් කවුරුන් හෝ මා සිහි කිරීමෙන් ඉවත හැරෙන්නේද, ඔහුට අත්වන්නේ කරදරකාරී ජීවිතයකි. තවද පුනරුත්ථාන දිනයේදී අපි ඔහුව අන්ධයෙකු ලෙස නැගිටුවන්නෙමු'.

قَالَ رَبِّ لِمَ حَشَرْتَنِي أَعْمَىٰ وَقَدْ كُنتُ بَصِيرًا ﴿١٢٦﴾

126. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! මා (මෙයට පෙර) පෙනීම ඇත්තෙකුව සිටියදී ඔබ මා අන්ධව නැගිටුවේ මන්ද,?'යි පවසන්නේය.

قَالَ كَذَٰلِكَ أَتَتْكَ آيَاتُنَا فَنَسِيتَهَا ۖ وَكَذَٰلِكَ الْيَوْمَ تُنسَىٰ ﴿١٢٧﴾

127. '(එය වන්නේ) මෙයාකාරයටය. අපගේ සළකුණු නුඹ වෙත පැමිණියේය. නුඹ ඒවා නොසලකා හැරියෙහිය. තවද ඒ ආකාරයටම මෙදින නුඹ නොසලකා හරිනු ලබන්නෙහියැ'යි (දෙවියන්) පවසන්නේය.

وَكَذَٰلِكَ نَجْزِي مَنْ أَسْرَفَ وَلَمْ يُؤْمِن بِآيَاتِ رَبِّهِ ۚ وَلَعَذَابُ الْآخِرَةِ أَشَدُّ وَأَبْقَىٰ ﴿١٢٨﴾

128. තවද කවුරුන් හෝ සීමාව ඉක්මවමින් තම අධිපතියාණන්ගේ සළකුණු කෙරෙහි විශ්වාස නොකරන්නේද ඔහුට අපි ප්‍රතිවිපාකය දෙන්නේ මෙලෙසය. තවද පරලොව දඬුවම නියතවශයෙන්ම ඉතා දැඩි මෙන්ම දිගු කල් පවතින්නේය.

أَفَلَمْ يَهْدِ لَهُمْ كَمْ أَهْلَكْنَا قَبْلَهُم مِّنَ الْقُرُونِ يَمْشُونَ فِي مَسَاكِنِهِمْ ۗ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّأُولِي النُّهَىٰ ﴿١٢٩﴾

129. මොවුන්ට පෙර අපි පරම්පරා කොපමණක් විනාශ කර ඇත්තෙමුද? එය මොවුනට මග පෙන්වීමක් නොවන්නේද? මොවුන් (දැන්) සැරිසරන්නේ (විනාශයට පත්වූ) ඔවුන්ගේ වාසස්ථාන වලය. ඇත්තෙන්ම වටහාගන්නා අයට එහි සළකුණු ඇත.

وَلَوْلَا كَلِمَةٌ سَبَقَتْ مِن رَّبِّكَ لَكَانَ لِزَامًا وَأَجَلٌ مُّسَمًّى ﴿١٣٠﴾

130. තවද ඔබ අධිපතියාණන්ගෙන් වචනය සහ (කලින්) නියමිත කාල අවකාශයක් නොතිබුණි නම් (ඔවුන්ගේ දඬුවම) ස්ථිර වන්නට තිබුණි.

فَاصْبِرْ عَلَىٰ مَا يَقُولُونَ وَسَبِّحْ بِحَمْدِ رَبِّكَ قَبْلَ طُلُوعِ الشَّمْسِ وَقَبْلَ غُرُوبِهَا ۖ

131. එමනිසා ඔවුන් පවසන දෙය ඉවසීමෙන් දරා ගන්න. තවද හිරු උදා වීමට පෙරද එය බැස යාමට පෙරද ඔබගේ අධිපතියාණන්ගේ

وَمِنْ اٰنَآئِ الَّيْلِ فَسَبِّحْ وَاَطْرَافَ النَّهَارِ لَعَلَّكَ تَرْضٰى ﴿١٣١﴾

ප්‍රසංශාව සමග (ඔහු) සුවිශුද්ධ කරන්න. තවද, ඔබ (සැබෑ) සොම්නස ලබා ගනු පිණිස රාත්‍රියේ හෝරාවන්හිද, දවසේ කෙළවරවල්හිද (ඔහු) සුවිශුද්ධ කරන්න.

وَلَا تَمُدَّنَّ عَيْنَيْكَ اِلٰى مَا مَتَّعْنَا بِهٖٓ اَزْوَاجًا مِّنْهُمْ زَهْرَةَ الْحَيٰوةِ الدُّنْيَا ۙ لِنَفْتِنَهُمْ فِيْهِ ؕ وَرِزْقُ رَبِّكَ خَيْرٌ وَّاَبْقٰى ﴿١٣٢﴾

132. තවද, අපි ඔවුන්ගෙන් ඇතැම් පිරිස් වලට (කෙටි කලකට) භුක්ති විඳීම පිණිස පිරිනමා ඇති මෙලොවේ අලංකාර දේ වෙත ඔබගේ දෑස් (කිසිසේත්) යොමු නොකරන්න. එය අප ඔවුන්ව එමගින් පිරික්සනු පිණිසය. තවද, ඔබගේ අධිපතියාණන් විසින් දෙනලද ජීවනෝපාය වඩාත් හොඳ මෙන්ම දිගු කල් පවතින්නකි.

وَاْمُرْ اَهْلَكَ بِالصَّلٰوةِ وَاصْطَبِرْ عَلَيْهَا ؕ لَا نَسْئَلُكَ رِزْقًا ؕ نَحْنُ نَرْزُقُكَ ؕ وَالْعَاقِبَةُ لِلتَّقْوٰى ﴿١٣٣﴾

133. තවද, ඔබගේ ජනතාවට නමස්කාරය කිරීමට අණ කරන්න. තවද, එහි නිරත වන්න. අපි ඔබගෙන් ජීවනෝපාය ඉල්ලන්නේ නැත. ඔබට එය සපයන්නේ අපිමය. තවද, අවසන් ඵලය බියබැතිමත්කම සඳහා වේ.

وَقَالُوْا لَوْلَا يَاْتِيْنَا بِاٰيَةٍ مِّنْ رَّبِّهٖ ؕ اَوَلَمْ تَاْتِهِمْ بَيِّنَةُ مَا فِى الصُّحُفِ الْاُوْلٰى ﴿١٣٤﴾

134. තවද, ඔවුහු 'ඔහු අපට ඔහුගේ අධිපතියාණන්ගෙන් සළකුණක් ගෙන නොඑන්නේ මන්දැ?'යි කියති. පෙර වූ ශුද්ධ ලියවිලිවල (අඩංගු) පැහැදිලි සාක්ෂි ඔවුන් වෙත නොපැමිණියේද?

وَلَوْ اَنَّآ اَهْلَكْنٰهُمْ بِعَذَابٍ مِّنْ قَبْلِهٖ لَقَالُوْا رَبَّنَا لَوْلَآ اَرْسَلْتَ اِلَيْنَا رَسُوْلًا فَنَتَّبِعَ اٰيٰتِكَ مِنْ قَبْلِ اَنْ نَّذِلَّ وَنَخْزٰى ﴿١٣٥﴾

135. තවද, අපි එයට පෙර ඔවුන්ව දඬුවමකින් විනාශ කළහොත්, ඔවුන් නියතවශයෙන්ම (මෙසේ) පවසනු ඇත. 'අප අධිපතියාණෙනි! ඔබ අපහට දූතයෙකුව නොඑව්වේ මන්ද? අපි අවමානයටද නින්දාවටද පත්වීමට පෙර ඔබගේ අණ පිළිපැදීමට ඉඩ තිබුණි'.

قُلْ كُلٌّ مُّتَرَبِّصٌ فَتَرَبَّصُوْا ۚ فَسَتَعْلَمُوْنَ مَنْ اَصْحٰبُ الصِّرَاطِ السَّوِيِّ وَمَنِ اهْتَدٰى ﴿١٣٦﴾ ع

136. 'සෑම කෙනෙක්ම බලා සිටින්නෝය. එමනිසා නුඹලාද බලා සිටිනු. යහමාර්ගයෙහි සිටින ජනතාව කවුරුන්ද, (සත්‍ය) මගපෙන්වීම අනුගමනය කරන්නේ කවුරුන්දැයි නුඹලා දැනගන්නෙහු යැ'යි පවසන්න.



## අල් අන්බියා

(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِقۡتَرَبَ لِلنَّاسِ حِسَابُهُمۡ وَهُمۡ فِىۡ غَفۡلَةٍ مُّعۡرِضُوۡنَ‌ۚ ۝٢

2. මිනිසුනට ඔවුන්ගේ ගණන් ගැනීමේ කාලය සමීප වී ඇත. එහෙත් ඔවුහු නොසැලකිලිමත්ව ඉවත හැරෙන්නෝය.

17 කොටස

مَا يَاۡتِيۡهِمۡ مِّنۡ ذِكۡرٍ مِّنۡ رَّبِّهِمۡ مُّحۡدَثٍ اِلَّا اسۡتَمَعُوۡهُ وَهُمۡ يَلۡعَبُوۡنَۙ ۝٣

3. ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් ඔවුනට නව අනුශාසනාවක් පැමිණෙන සෑම විටකම ඔවුන් (එය) සෙල්ලමට ගනිමින් මිස එයට ඔවුන් සවන් නොදෙති.

لَاهِيَةً قُلُوۡبُهُمۡ‌ ؕ وَاَسَرُّوا النَّجۡوَى‌ۖ الَّذِيۡنَ ظَلَمُوۡا‌ۖ هَلۡ هٰذَاۤ اِلَّا بَشَرٌ مِّثۡلُكُمۡ‌ۚ اَفَتَاۡتُوۡنَ السِّحۡرَ وَاَنۡتُمۡ تُبۡصِرُوۡنَ ۝٤

4. (තවද) ඔවුන්ගේ හදවත් නොසැලකිලිමත් තත්ත්වයෙහිය. තවද වරද කළ අය ඔවුන්ගේ රහස් යෝජනාවන් සඟවා, (මෙසේ පවසති.) 'මෙම (මිනිසා) නුඹලා මෙන් මනුෂ්‍යයෙකු නොවේද? එසේනම් නුඹලා එය දැක දැක නුඹලා මායාවට වශී වන්නෙහුද?'

قٰلَ رَبِّىۡ يَعۡلَمُ الۡقَوۡلَ فِى السَّمَآءِ وَالۡاَرۡضِ‌ وَهُوَ السَّمِيۡعُ الۡعَلِيۡمُ ۝٥

5. (මෙයට පිළිතුරු වශයෙන් වක්තෘවරයා මෙසේ) කීවේය. 'අහස්හිද පොළොවෙහිද කතා කරනු ලබන දේ මාගේ අධිපතියාණන් දන්නේය. තවද ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය'.

بَلۡ قَالُوۡۤا اَضۡغَاثُ اَحۡلَامٍۢ بَلِ افۡتَرٰٮهُ بَلۡ هُوَ شَاعِرٌ ۖۚ فَلۡيَاۡتِنَا بِاٰيَةٍ كَمَاۤ اُرۡسِلَ الۡاَوَّلُوۡنَ ۝٦

6. නොඑසේය, ඔවුහු '(මේවා) අවුල් වූ සිහිනයන්ය. එපමණක් නොව ඔහු එය ගොතා ඇත. එපමණක් නොව ඔහු කවියෙක්ය. එසේ නම්, පෙර සිටි (වක්තෘවරුන් සළකුණු සමග) එවන ලද සේම ඔහුද අප හට සළකුණක් ගෙන ආ යුතු යැ'යි කියති.

مَاۤ اٰمَنَتۡ قَبۡلَهُمۡ مِّنۡ قَرۡيَةٍ اَهۡلَكۡنٰهَا‌ ۚ

7. ඔවුනට පෙර අප විනාශ කළ කිසිම නගරයක කිසිවෙක්වත්

اَفَهُمۡ يُؤۡمِنُوۡنَ ﴿۷﴾

විශ්වාස කළේ නැත. එසේ වුවත් ඔවුහු විශ්වාස කරන්නෙහුද?

وَمَاۤ اَرۡسَلۡنَا قَبۡلَكَ اِلَّا رِجَالًا نُّوۡحِىۡۤ اِلَيۡهِمۡ فَسۡـَٔلُوۡۤا اَهۡلَ الذِّكۡرِ اِنۡ كُنۡتُمۡ لَا تَعۡلَمُوۡنَ ﴿۸﴾

8. තවද අපි ඔවුනට අනාවරණය පහළ කළ පුරුෂයින් මිස ඔබට පෙර දූතයින් ලෙස කිසිවෙකුව අපි නොඑව්වෙමු. එබැවින් නුඹලා නොදන්නේ නම් දේව ලියවිලි දත්තන්ගෙන් අසනු.

وَمَا جَعَلۡنٰهُمۡ جَسَدًا لَّا يَاۡكُلُوۡنَ الطَّعَامَ وَمَا كَانُوۡا خٰلِدِيۡنَ ﴿۹﴾

9. එමෙන්ම අපි ඔවුනට ආහාර අනුභව නොකරන සිරුරු නොදුනිමු. තවද ඔවුහු සදා ජීවත්වන්නන් නොවූහ.

ثُمَّ صَدَقۡنٰهُمُ الۡوَعۡدَ فَاَنۡجَيۡنٰهُمۡ وَمَنۡ نَّشَآءُ وَاَهۡلَـكۡنَا الۡمُسۡرِفِيۡنَ ﴿۱۰﴾

10. පසුව (අපගේ) පොරොන්දුව අපි ඔවුනට ඉටු කළෙමු. එමෙන්ම අපි ඔවුන්වද අපි අභිමත වූ අයවද මුදවා ගත්තෙමු. තවද සීමාව ඉක්මවන්නන්ව අපි විනාශ කළෙමු.

لَقَدۡ اَنۡزَلۡنَاۤ اِلَيۡكُمۡ كِتٰبًا فِيۡهِ ذِكۡرُكُمۡ‌ؕ اَفَلَا تَعۡقِلُوۡنَ ﴿۱۱﴾

11. අපි නුඹලාට ග්‍රන්ථයක් නියතවශයෙන්ම පහළ කර ඇත්තෙමු. එහි නුඹලාට අනුශාසනාව ඇත. එසේ නම් නුඹලා තේරුම් නොගන්නෙහුද?

وَكَمۡ قَصَمۡنَا مِنۡ قَرۡيَةٍ كَانَتۡ ظَالِمَةً وَّاَنۡشَاۡنَا بَعۡدَهَا قَوۡمًا اٰخَرِيۡنَ ﴿۱۲﴾

12. එමෙන්ම වැරදිසහගතව ක්‍රියා කළ කොපමණ නගරයන් අපි මුළුමනින්ම විනාශ කර, එයට පසු වෙනත් ජනතාවන් ඇති කළෙමුද!

فَلَمَّاۤ اَحَسُّوۡا بَاۡسَنَاۤ اِذَا هُمۡ مِّنۡهَا يَرۡكُضُوۡنَ ﴿۱۳﴾

13. තවද අපගේ දඬුවම ඔවුනට දැණුනු විට, එසැනින්ම ඔවුන් එයින් පලා යැමට පටන් ගත්තෝය.

لَا تَرۡكُضُوۡا وَارۡجِعُوۡۤا اِلٰى مَاۤ اُتۡرِفۡتُمۡ فِيۡهِ وَمَسٰكِنِكُمۡ لَعَلَّكُمۡ تُسۡـَٔلُوۡنَ ﴿۱۴﴾

14. 'පලා නොයනු! එහෙත් නුඹලාගෙන් ප්‍රශ්ණ කරනු ලබන පිණිස, නුඹලා සැප විඳින ලද දේ වෙතද නුඹලාගේ වාසස්ථානයන් වෙතද ආපසු යනු'.

قَالُوۡا يٰوَيۡلَنَاۤ اِنَّا كُنَّا ظٰلِمِيۡنَ ﴿۱۵﴾

15. ඔවුහු, 'අහෝ! අපට වූ දුක, ඇත්තෙන්ම අපි වරදකරුවන්ව සිටියෙමු'යි කීහ.

فَمَا زَالَتْ تِّلْكَ دَعْوٰىهُمْ حَتّٰى جَعَلْنٰهُمْ حَصِيْدًا خٰمِدِيْنَ ﴿١٦﴾

16. තවද අපි ඔවුන්ව කපා හරින ලද වගා බිමක අළු බවට පත්කරන තුරු ඔවුන්ගේ මෙම වැළපීම නතර නොවීය.

وَمَا خَلَقْنَا السَّمَآءَ وَالْاَرْضَ وَمَا بَيْنَهُمَا لٰعِبِيْنَ ﴿١٧﴾

17. තවද අහසද පෙළොවද ඒ දෙක අතර ඇති සියළු දේද අපි කෙළි සෙල්ලමක් ලෙස නොමැව්වෙමු.

لَوْ اَرَدْنَآ اَنْ نَّتَّخِذَ لَهْوًا لَّاتَّخَذْنٰهُ مِنْ لَّدُنَّآ ۖ اِنْ كُنَّا فٰعِلِيْنَ ﴿١٨﴾

18. යම් විනෝදමත් ක්‍රියාවක් කිරීමට අප පැතුවේ නම්, නියතවශයෙන්ම අප එය කරන්නවුන් නම්, අප සතුව තිබෙන්නා වූ දෙයින්ම එය ලබාගන්නට තිබුණි.

بَلْ نَقْذِفُ بِالْحَقِّ عَلَى الْبَاطِلِ فَيَدْمَغُهٗ فَاِذَا هُوَ زَاهِقٌ ۗ وَلَكُمُ الْوَيْلُ مِمَّا تَصِفُوْنَ ﴿١٩﴾

19. නොඑසේය අපි සත්‍යය, අසත්‍යය මත හෙළන්නෙමු. එවිට එය(සත්‍යය) එහි(අසත්‍යයෙහි) හිස කඩා දමන්නේය. තවද බලව! එය අතුරුදහන් වන්නේය. එමෙන්ම නුඹලා (දෙවියන්ට) ආරෝපණය කරන දේ නිසා නුඹලාට විනාශයයි.

وَلَهٗ مَنْ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ۗ وَمَنْ عِنْدَهٗ لَا يَسْتَكْبِرُوْنَ عَنْ عِبَادَتِهٖ وَلَا يَسْتَحْسِرُوْنَ ﴿٢٠﴾

20. අහස්හිද පොළොවෙහිද වන සියල්ලම ඔහුට හිමිය. තවද ඔහු අභියස සිටින අය ඔහුට නැමදීමට උඩඟු නොවෙති. තවද ඔවුහු විඩාවට පත් නොවෙති.

يُسَبِّحُوْنَ الَّيْلَ وَالنَّهَارَ لَا يَفْتُرُوْنَ ﴿٢١﴾

21. ඔවුහු රාත්‍රියෙහිද දවාලයෙහිද (ඔහුව) සුවිශුද්ධ කරති. තවද ඔවුහු මැලි නොවෙති.

اَمِ اتَّخَذُوْٓا اٰلِهَةً مِّنَ الْاَرْضِ هُمْ يُنْشِرُوْنَ ﴿٢٢﴾

22. පොළොවෙන් දෙවිවරුන්ව ඔවුන් ඇති කර ගත්හ. (එම දෙවිවරුන් වන)ඔවුන් මළවුන්ව නැගිටුවන්නේද?

لَوْ كَانَ فِيْهِمَآ اٰلِهَةٌ اِلَّا اللّٰهُ لَفَسَدَتَا ۚ فَسُبْحٰنَ اللّٰهِ رَبِّ الْعَرْشِ عَمَّا

23. (අහස් සහ පොළොව යන) දෙකෙහි අල්ලාහ් හැර අන් දෙවිවරුන් සිටියේ නම්, ඒ දෙකම අවුල් ජාලයක් වන්නට තිබුණි. ඔවුන් ආරෝපණය කරන දෙයට වඩා

يَصِفُوْنَ ﴿٢٣﴾

සිංහාසනයේ අධිපති වන අල්ලාහ් සුවිශුද්ධය.

لَا يُسْـَٔلُ عَمَّا يَفْعَلُ وَهُمْ يُسْـَٔلُوْنَ ﴿٢٤﴾

24. ඔහු කුමක් කළද ඒ ගැන ප්‍රශ්න කරනු නොලබන්නේය. නමුත් ඔවුහු ප්‍රශ්න කරනු ලබන්නෝමය.

اَمِ اتَّخَذُوْا مِنْ دُوْنِهٖۤ اٰلِهَةً ؕ قُلْ هَاتُوْا
بُرْهَانَكُمْ ۚ هٰذَا ذِكْرُ مَنْ مَّعِىَ وَذِكْرُ
مَنْ قَبْلِىْ ؕ بَلْ اَكْثَرُهُمْ لَا يَعْلَمُوْنَ ۙ
الْحَقَّ فَهُمْ مُّعْرِضُوْنَ ﴿٢٥﴾

25. ඔවුන්, ඔහු හැර අන් දෙවිවරුන්ව (නැමදීමට) ගත්තේද? පවසන්න, 'නුඹලාගේ සාධක ගෙන එනු. මෙය මා සමඟ සිටින අයගේ ග්‍රන්ථය මෙන්ම, මට පෙර සිටි අයගේද ග්‍රන්ථය වේ'. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය සත්‍යය නොදනිති. එබැවින් ඔවුන් ඉවත හැරෙන්නන්ය.

وَمَاۤ اَرْسَلْنَا مِنْ قَبْلِكَ مِنْ رَّسُوْلٍ
اِلَّا نُوْحِىْۤ اِلَيْهِ اَنَّهٗ لَاۤ اِلٰهَ اِلَّاۤ اَنَا
فَاعْبُدُوْنِ ﴿٢٦﴾

26. තවද අපි ඔබට පෙර කිසිදු දූතයෙකුව, 'නැමදීමට සුදුස්සා මා හැර අන් දෙවියෙක් නොමැත, නමුත් මා හට (පමණක්) නමදිනු' (යැයි පවසමින්) අපි ඔහුට අනාවරණය කළා මිස නොඑව්වෙමු.

وَقَالُوا اتَّخَذَ الرَّحْمٰنُ وَلَدًا سُبْحٰنَهٗ ؕ
بَلْ عِبَادٌ مُّكْرَمُوْنَ ۙ ﴿٢٧﴾

27. තවද 'මහා කාරුණික (දෙවියන්) ඔහුට පුතෙකු ගත්තේයැ'යි ඔවුහු කියති. ඔහු පරිශුද්ධය. නමුත් (දේව පුත්‍රයන් යැයි ආරෝපණය කරනු ලබන) ඔවුන් (දෙවියන්ගේ) ගෞරවාන්විත දාසයින් (පමණක්)ය.

لَا يَسْبِقُوْنَهٗ بِالْقَوْلِ وَهُمْ بِاَمْرِهٖ
يَعْمَلُوْنَ ﴿٢٨﴾

28. ඔවුහු වචනයෙන් ඔහු අභිබවා නොයන්නෝය. එමෙන්ම ඔහුගේ විධානයට අනුව (පමණක්) ඔවුහු ක්‍රියා කරන්නෝය.

يَعْلَمُ مَا بَيْنَ اَيْدِيْهِمْ وَمَا خَلْفَهُمْ وَلَا
يَشْفَعُوْنَ ۙ اِلَّا لِمَنِ ارْتَضٰى وَهُمْ مِّنْ
خَشْيَتِهٖ مُشْفِقُوْنَ ﴿٢٩﴾

29. ඔවුන්ට ඉදිරියේ ඇති දේද ඔවුන්ට පසුපස ඇති දේද ඔහු දන්නේය. තවද ඔහු අනුමත කරන අයට විනා අන් කිසිවෙකුටත් ඔවුන් මැදිහත් නොවන්නෝය. තවද ඔහුට ඇති බියෙන් ඔවුන් අවධානයෙන් කටයුතු කරන්නෝය.

وَمَنْ يَّقُلْ مِنْهُمْ اِنِّىْۤ اِلٰهٌ مِّنْ دُوْنِهٖ

30. තවද ඔවුන්ගෙන් කවුරුන් හෝ

فَذٰلِكَ نَجۡزِيۡهِ جَهَنَّمَ ؕ كَذٰلِكَ نَجۡزِى الظّٰلِمِيۡنَ ﴿٢٩﴾

'ඔහු හැර මාත් දෙවියෙක් වෙමි'යි පවසන්නේද, ඔහුට ප්‍රතිවිපාකය ලෙස අපි නිරය දෙන්නෙමු. අපි වරදකරුවන්ට ප්‍රතිවිපාක දෙන්නේ මෙලෙසය.

اَوَلَمۡ يَرَ الَّذِيۡنَ كَفَرُوۡۤا اَنَّ السَّمٰوٰتِ وَالۡاَرۡضَ كَانَتَا رَتۡقًا فَفَتَقۡنٰهُمَا ؕ وَجَعَلۡنَا مِنَ الۡمَآءِ كُلَّ شَىۡءٍ حَىٍّ ؕ اَفَلَا يُؤۡمِنُوۡنَ ﴿٣٠﴾

31. අහස් සහ පොළොව සංවෘත වූ (ස්කන්ධයක්ව) තිබුණි. පසුව අපි ඒවා විවෘත කළ බව අවිශ්වාසීතයින් නොදකින්නේද? පසුව අපි ජලයෙන් සියළු ජීවයක්ම ඇති කළෙමු. එවිටත් ඔවුන් විශ්වාස නොකරන්නේද?

وَجَعَلۡنَا فِى الۡاَرۡضِ رَوَاسِىَ اَنۡ تَمِيۡدَ بِهِمۡ وَجَعَلۡنَا فِيۡهَا فِجَاجًا سُبُلًا لَّعَلَّهُمۡ يَهۡتَدُوۡنَ ﴿٣١﴾

32. තවද අපි පොළොව මත කඳු, ඒවා ඔවුන්ට ජීවනෝපාය සපයනු පිණිස ඇති කළෙමු. තවද ඔවුන් නිවැරදි මාර්ගයෙහි නිරතවනු පිණිස අපි එහි පුළුල් මාර්ගයන්ද ඇති කළෙමු.

وَجَعَلۡنَا السَّمَآءَ سَقۡفًا مَّحۡفُوۡظًا ۚ وَّهُمۡ عَنۡ اٰيٰتِهَا مُعۡرِضُوۡنَ ﴿٣٢﴾

33. තවද අපි අහස මනා ආරක්ෂිත වහලක් කළෙමු. එහෙත් ඔවුහු එහි සළකුණු වලින් ඉවත හැරෙන්නන්ය.

وَهُوَ الَّذِىۡ خَلَقَ الَّيۡلَ وَالنَّهَارَ وَالشَّمۡسَ وَالۡقَمَرَ ؕ كُلٌّ فِىۡ فَلَكٍ يَّسۡبَحُوۡنَ ﴿٣٣﴾

34. එමෙන්ම රාත්‍රිය සහ දවාලද ඉර සහ සඳද මවා ඇත්තේ ඔහුමය. සියල්ලම (එහි) කක්ෂයෙහි ගමන් කරති.

وَمَا جَعَلۡنَا لِبَشَرٍ مِّنۡ قَبۡلِكَ الۡخُلۡدَ ؕ اَفَا۟ٮِٕنۡ مِّتَّ فَهُمُ الۡخٰلِدُوۡنَ ﴿٣٤﴾

35. ඔබට පෙර අපි කිසිදු මනුෂ්‍යයෙකුට සදාකාලික ජීවිතයක් නොදුන්නෙමු. එසේ නම් ඔබ මරණයට පත්වී ඔවුන් (මෙහි) සදා ජීවත්වන්නන් වෙත්ද?

كُلُّ نَفۡسٍ ذَآٮِٕقَةُ الۡمَوۡتِ ؕ وَنَبۡلُوۡكُمۡ بِالشَّرِّ وَالۡخَيۡرِ فِتۡنَةً ؕ وَاِلَيۡنَا تُرۡجَعُوۡنَ ﴿٣٥﴾

36. සෑම ආත්මයක්ම මරණය අත් විඳින්නේමය. එමෙන්ම අපි නපුර සහ යහපත මගින් නුඹලාව පිරික්සුමට ලක් කරන්නෙමු. තවද නුඹලා ආපසු පැමිණෙන්නේ අප වෙතටමය.

37. තවද අවිශ්වාසිතයින් ඔබව දකින විට ඔවුහු ඔබව විහිළුවට මිස නොගනිති. (ඔවුහු), 'නුඹලාගේ දෙවිවරුන් ගැන (දුර්වලකම්) කියා පාන්නේ මොහුදැ?'යි කියති. තවද මහා කාරුණික (දෙවියන්) ගැන සඳහන් කිරීම (උඩඟුවෙන්) ප්‍රතික්ෂේප කරන්නන් ඔවුහුමය.

وَإِذَا رَءَاكَ ٱلَّذِينَ كَفَرُوٓا۟ إِن يَتَّخِذُونَكَ إِلَّا هُزُوًا أَهَـٰذَا ٱلَّذِى يَذْكُرُ ءَالِهَتَكُمْ وَهُم بِذِكْرِ ٱلرَّحْمَـٰنِ هُمْ كَـٰفِرُونَ ٣٧

38. මිනිසාව ඉක්මන් ගති ඇතිව මවන ලදී. මාගේ සළකුණු (නිසැකවම) මම නුඹලාට පෙන්වන්නෙමි. නමුත් (ඒවා) ඉක්මන් වීමට මාගෙන් ආයාචනා නොකරනු.

خُلِقَ ٱلْإِنسَـٰنُ مِنْ عَجَلٍ سَأُو۟رِيكُمْ ءَايَـٰتِى فَلَا تَسْتَعْجِلُونِ ٣٨

39. එමෙන්ම 'නුඹලා සත්‍යවාදීන් නම්, මෙම පෙරොන්දුව කවදා (ඉටුවන්නේදැ?)'යි ඔවුන් පවසන්නෝය.

وَيَقُولُونَ مَتَىٰ هَـٰذَا ٱلْوَعْدُ إِن كُنتُمْ صَـٰدِقِينَ ٣٩

40. තමන්ගේ මුහුණුද තමන්ගේ පිටුපසද ගින්නෙන් වළක්වාලන්නට පුළුවන් කමක් නොවන්නාවූ එමෙන්ම තමන්ට උදව් නොකරනු ලබන්නාවූද එම අවස්ථාව අවිශ්වාසිතයින් දැන සිටියා නම්!

لَوْ يَعْلَمُ ٱلَّذِينَ كَفَرُوا۟ حِينَ لَا يَكُفُّونَ عَن وُجُوهِهِمُ ٱلنَّارَ وَلَا عَن ظُهُورِهِمْ وَلَا هُمْ يُنصَرُونَ ٤٠

41. නොඑසේය, එය ඔවුන් මත ක්ෂණිකව පැමිණ එය ඔවුන්ව ව්‍යාකුලත්වයට පත් කරන්නේය. එමෙන්ම ඔවුන්ට එය වළක්වන්නට නොහැකිවන අතර ඔවුන්ට කාල අවකාශය දෙනු නොලබන්නේය.

بَلْ تَأْتِيهِم بَغْتَةً فَتَبْهَتُهُمْ فَلَا يَسْتَطِيعُونَ رَدَّهَا وَلَا هُمْ يُنظَرُونَ ٤١

42. තවද ඔබට පෙර දූතයෝ සත්තකින්ම සරදම් කරනු ලැබූහ. නමුත් ඔවුන් යම් දේ හේතුවෙන් ඔවුන්ව සරදම් කළේද ඒ දෙයම සරදම් කළ අයව වටලාගත්තේය.

وَلَقَدِ ٱسْتُهْزِئَ بِرُسُلٍ مِّن قَبْلِكَ فَحَاقَ بِٱلَّذِينَ سَخِرُوا۟ مِنْهُم مَّا كَانُوا۟ بِهِۦ يَسْتَهْزِءُونَ ٤٢

43. පවසන්න, 'රාත්‍රියෙහි සහ දවාලෙහි කාරුණික වූ (දෙවියන්)ගේ ග්‍රහණයෙන් නුඹලාව ආරක්ෂා කළ හැක්කේ කාහටද?' එහෙත් ඔවුහු

قُلْ مَن يَكْلَؤُكُم بِٱلَّيْلِ وَٱلنَّهَارِ مِنَ ٱلرَّحْمَـٰنِ بَلْ هُمْ عَن ذِكْرِ رَبِّهِم

مُّعۡرِضُونَ ﴿٤٣﴾

ඔවුන්ගේ අධිපතියාණන්ව සිහිකිරීමෙන් පිටුපා යන්නන්ය.

أَمۡ لَهُمۡ ءَالِهَةٞ تَمۡنَعُهُم مِّن دُونِنَاۚ
لَا يَسۡتَطِيعُونَ نَصۡرَ أَنفُسِهِمۡ وَلَا هُم
مِّنَّا يُصۡحَبُونَ ﴿٤٤﴾

44. අප හැර ඔවුන්ව ආරක්ෂා කළ හැකි අන් දෙවිවරුන් ඔවුනට සිටිත්ද? (දෙවිවරුන් වන) ඔවුනට තමන්ටම උදව් කර ගත නොහැක. තවද අපට එරෙහිව (කිසිවෙකුටත්) ඔවුනට පිහිට වන්නටද නොහැක.

بَلۡ مَتَّعۡنَا هَٰٓؤُلَآءِ وَءَابَآءَهُمۡ حَتَّىٰ طَالَ
عَلَيۡهِمُ ٱلۡعُمُرُۗ أَفَلَا يَرَوۡنَ أَنَّا نَأۡتِي
ٱلۡأَرۡضَ نَنقُصُهَا مِنۡ أَطۡرَافِهَآۚ أَفَهُمُ
ٱلۡغَٰلِبُونَ ﴿٤٥﴾

45. එහෙත්, අපි ඔවුන්ටද ඔවුන්ගේ පියවරුන්ටද දීර්ඝ කාලයක් තෙක් (මෙලොවෙහි යහපත් දෙවල් වලින්) ජීවනෝපාය බහුලව සපයා දුන්නෙමු. අපි භූමිය එහි ඇති මායිම් වලින් එය අඩු කරමින් එන බව ඔවුහු නොදකිත්ද? මෙසේ තිබියදීත් ඔවුන්ට ජයග්‍රාහීන් විය හැකිද?

قُلۡ إِنَّمَآ أُنذِرُكُم بِٱلۡوَحۡيِۚ وَلَا يَسۡمَعُ
ٱلصُّمُّ ٱلدُّعَآءَ إِذَا مَا يُنذَرُونَ ﴿٤٦﴾

46. පවසන්න, 'මම නුඹලාට අවවාද කරන්නේ හුදෙක් (දේව) අනාවරණය මගිනි. නමුත් බිහිරින්ට අවවාද කරනු ලබන විට එම කැඳවීම ඔවුන්ට ඇසිය නොහැක'.

وَلَئِن مَّسَّتۡهُمۡ نَفۡحَةٞ مِّنۡ عَذَابِ
رَبِّكَ لَيَقُولُنَّ يَٰوَيۡلَنَآ إِنَّا كُنَّا ظَٰلِمِينَ ﴿٤٧﴾

47. තවද ඔබ අධිපතියාණන්ගේ දඬුවමේ උණුසුම් පොදක්වත් ඔවුන්ව ස්පර්ශ කළහොත් ඔවුහු නියතවශයෙන්ම, 'අපට විනාශයයි! අපි ඇත්තෙන්ම වරදකරුවන් වූවෙමු'යි හඬනගා කියන්නෝය.

وَنَضَعُ ٱلۡمَوَٰزِينَ ٱلۡقِسۡطَ لِيَوۡمِ ٱلۡقِيَٰمَةِ
فَلَا تُظۡلَمُ نَفۡسٞ شَيۡـٔٗاۖ وَإِن كَانَ مِثۡقَالَ
حَبَّةٖ مِّنۡ خَرۡدَلٍ أَتَيۡنَا بِهَاۗ وَكَفَىٰ بِنَا
حَٰسِبِينَ ﴿٤٨﴾

48. තවද පුනරුත්ථාන දිනය වෙනුවෙන් අපි යුක්තියේ (ඉතා නිවැරදි) තුලාව පිළියෙල කරන්නෙමු. එබැවින් කිසිදු ආත්මයකට අල්පයක්වත් වැරදි නොකරනු ලබන්නේය. තවද එය අබ ඇටයක තරම් බරක් වුවද අපි එය ගෙනහැර පාන්නෙමු. තවද ගණන් ගන්නන් වශයෙන් අප ප්‍රමාණවත්ය.

وَلَقَدۡ ءَاتَيۡنَا مُوسَىٰ وَهَٰرُونَ ٱلۡفُرۡقَانَ

49. එමෙන්ම අපි මූසාටද හාරූන්ටද විමංසනයත් ආලෝකයත්

وَضِيَآءً وَذِكۡرًا لِّلۡمُتَّقِينَ ﴿٤٩﴾

තවද බියබැතිමතුන් සඳහා සිහි කිරීමත් දුනිමු.

ٱلَّذِينَ يَخۡشَوۡنَ رَبَّهُم بِٱلۡغَيۡبِ وَهُم مِّنَ ٱلسَّاعَةِ مُشۡفِقُونَ ﴿٥٠﴾

50. ඔවුන් ඔවුන්ගේ අධිපතියාණන්ට රහසිගතවද බිය වෙති. තවද (විනිශ්චයේ) එම හෝරාවටද මහත්සේ බිය වන්නන් වෙති.

وَهَٰذَا ذِكۡرٌ مُّبَارَكٌ أَنزَلۡنَٰهُۚ أَفَأَنتُمۡ لَهُۥ مُنكِرُونَ ﴿٥١﴾

51. තවද මෙය අප පහළ කළාවූ ආශිර්වාදාත්මක සිහිකිරීමකි. එසේනම් නුඹලා එය ප්‍රතික්ෂේප කරන්නෙහුද?

وَلَقَدۡ ءَاتَيۡنَآ إِبۡرَٰهِيمَ رُشۡدَهُۥ مِن قَبۡلُ وَكُنَّا بِهِۦ عَٰلِمِينَ ﴿٥٢﴾

52. තවද (මීට) පෙර අපි ඉබ්රාහීම්ට උචිත ඔහුගේ මඟපෙන්වීම දුන්නෙමු. තවද අපි ඔහුව මැනැවින් දැන සිටියෙමු.

إِذۡ قَالَ لِأَبِيهِ وَقَوۡمِهِۦ مَا هَٰذِهِ ٱلتَّمَاثِيلُ ٱلَّتِيٓ أَنتُمۡ لَهَا عَٰكِفُونَ ﴿٥٣﴾

53. ඔහු, 'නුඹලා කැප කළා වූ මේ පිළිමයන් මොනවාදෑ?'යි ඔහුගේ පියාගෙන් සහ ඔහුගේ ජනතාවගෙන් ඇසූ කල්හි.

قَالُواْ وَجَدۡنَآ ءَابَآءَنَا لَهَا عَٰبِدِينَ ﴿٥٤﴾

54. ඔවුහු, 'අපගේ පියවරුන්ද ඒවාට වඳිනු අපි දුටුවෙමු'යි පිළිතුරු දුන්හ.

قَالَ لَقَدۡ كُنتُمۡ أَنتُمۡ وَءَابَآؤُكُمۡ فِي ضَلَٰلٖ مُّبِينٖ ﴿٥٥﴾

55. ඔහු, 'ඇත්තෙන්ම නුඹලාද නුඹලාගේ පියවරුන්ද ප්‍රකට වරදෙහි වූවේ යැ'යි කීවේය.

قَالُوٓاْ أَجِئۡتَنَا بِٱلۡحَقِّ أَمۡ أَنتَ مِنَ ٱللَّٰعِبِينَ ﴿٥٦﴾

56. ඔවුහු, 'ඔබ අප වෙත සත්‍යය ගෙන ආවෙහිද? නැතහොත් ඔබත් විහිළු කරන්නන්ගෙන් කෙනෙකුදෑ?'යි ඇසූහ.

قَالَ بَل رَّبُّكُمۡ رَبُّ ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضِ ٱلَّذِي فَطَرَهُنَّ وَأَنَا۠ عَلَىٰ ذَٰلِكُم مِّنَ ٱلشَّٰهِدِينَ ﴿٥٧﴾

57. ඔහු 'නොඑසේය, නුඹලාගේ අධිපතියාණන් අහස් සහ පොළොවේ අධිපතියාණන්ය. ඒවා මැව්වේ ඔහුමය. එමෙන්ම මම එයට සාක්ෂි දරන්නන්ගෙන් කෙනෙකු වෙමි' යි පිළිතුරු දුන්නේය.

وَتَٱللَّهِ لَأَكِيدَنَّ أَصۡنَٰمَكُم بَعۡدَ أَن

58. 'තවද අල්ලාහ් සාක්කි, නුඹලා

تُوَلُّوا مُدْبِرِينَ ﴿٥٨﴾

හැරී ඉවත්ව ගිය පසු මම නියතවශයෙන්ම නුඹලාගේ ප්‍රතිමාවන්ට එරෙහිව සැලසුම් කරන්නෙමි'.

فَجَعَلَهُمْ جُذَاذًا إِلَّا كَبِيرًا لَّهُمْ لَعَلَّهُمْ إِلَيْهِ يَرْجِعُونَ ﴿٥٩﴾

59. එබැවින් ඔහු ඒවායින් ප්‍රධාන (පිළිමය) හැරෙන්නට (අන් සියල්ල) කැබලිවලට කඩා දැම්මේය. එය ඔවුන් (ඒ ගැන විමසීම සඳහා) ආපසු පැමිණෙනු පිණිසය.

قَالُوا مَن فَعَلَ هَٰذَا بِآلِهَتِنَا إِنَّهُ لَمِنَ الظَّالِمِينَ ﴿٦٠﴾

60. ඔවුහු, 'අපගේ දෙවිවරුන්ට මෙය කළේ කවුරුන්ද? නියත වශයෙන්ම ඔහු වරදකරුවෙක්ම විය යුතුයැ'යි කීහ.

قَالُوا سَمِعْنَا فَتًى يَذْكُرُهُمْ يُقَالُ لَهُ إِبْرَاهِيمُ ﴿٦١﴾

61. ඔවුහු, 'තරුණයෙක් ඒවා ගැන (ගර්වයෙන්) කථා කරනු අපට ඇසුනි. ඔහු ඉබ්‍රාහිම් නමින් අමතනු ලබන්නේ යැ'යි පැවසූහ.

قَالُوا فَأْتُوا بِهِ عَلَىٰ أَعْيُنِ النَّاسِ لَعَلَّهُمْ يَشْهَدُونَ ﴿٦٢﴾

62. ඔවුහු, 'මිනිසුන්ගේ ඇස් ඉදිරිපිට ඔවුන් දැකගනු පිණිස ඔහුව ගෙන එනු'යි කීහ.

قَالُوا أَأَنتَ فَعَلْتَ هَٰذَا بِآلِهَتِنَا يَا إِبْرَاهِيمُ ﴿٦٣﴾

63. එවිට ඔවුහු, 'එම්බල ඉබ්‍රාහිම් අපගේ දෙවිවරුන්ට මෙය කළේ ඔබ දැ?'යි ඇසීය.

قَالَ بَلْ فَعَلَهُ كَبِيرُهُمْ هَٰذَا فَاسْأَلُوهُمْ إِن كَانُوا يَنطِقُونَ ﴿٦٤﴾

*64. ඔහු, 'එසේද, නියතවශයෙන්ම කවුරුන් හෝ මෙය කර ඇත්තේය. මෙන්න ප්‍රධානියා මොහුය. මොවුන්ට කථා කළ හැකි නම් මොවුන්ගෙන්ම අසනු'යි පිළිතුරු දුන්නේය.

* සටහන. 64: ඉබ්‍රාහිම් නබි තුමා මුසාවාදියෙක් යනුවෙන් අර්තකථනය වනු ලබන්නේ යැයි බියෙන් සමහර පරිවර්තකයින් මෙම වාක්‍යයට සෘජුව හා වචනානුසාරයෙන් අර්තකථනය දීමෙන් වැළැකී සිටිති. පැහැදිලිවම කුඩා පිළිමයන් කඩා දැමුවේ ලොකු පිළිමය නොව, එහෙත් එය කළේ ඉබ්‍රාහිම් නබි තුමාය. එමනිසා 'මෙන්න ප්‍රධානියා මොහුය' යන කියමන ඉබ්‍රාහිම් නබි තුමා පවසන ලද්දේ යැයි ප්‍රකාශ කිරීම පැහැදිලිවම එතුමා කෙරෙහි දෝෂාරෝපණයට සමාන වේ. මෙහි එක් විෂයයක් අවධානයට ගත යුතුය. එනම් එය වැරදි කියමනක් නොව නමුත් ශක්තිමත්ව තර්ක කරන්නාවූ එක් ක්‍රියා මාර්ගයකි. සමහර අවස්ථා වලදී ඕනෑම කෙනෙකුට යමක් විශ්වාස කිරීම සඳහා එය ඉතා පැහැදිලිව තිබුණද අනුන් නොමග යවන්නට හිතාමතා කළ උත්සාහයක් නිසා ඒ ගැන සඳහන් කරුණු අවබෝධ කර ගැනීමට කිසිසේත් නොහැකි වන්නේය. නමුත් එය කර ඇත්තේ තේරුමක් නැති ආවේණිකවූ ක්‍රියාවන් කරන

فَرَجَعُوْٓا اِلٰٓى اَنْفُسِهِمْ فَقَالُوْٓا اِنَّكُمْ اَنْتُمُ الظّٰلِمُوْنَ ۙ﴿۶۵﴾

65. එවිට ඔවුහු තමන්ගේ ප්‍රධානීන් වෙත හැරී 'නියතවශයෙන්ම වරදෙහි ඇත්තේ නුඹලාමයැ'යි කීහ.

ثُمَّ نُكِسُوْا عَلٰى رُءُوْسِهِمْ ۚ لَقَدْ عَلِمْتَ مَا هٰٓؤُلَآءِ يَنْطِقُوْنَ ﴿۶۶﴾

66. එමෙන්ම ඔවුනට (ලැජ්ජාවෙන්) තමන්ගේ හිස් පහත දැමීමට සිදු විය. (තවද මෙසේ පැවසූහ). 'මේවා කථා නොකරන බව ඔබ ඉතා මැනැවින් දන්නෙහිය'.

قَالَ اَفَتَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ مَا لَا يَنْفَعُكُمْ شَيْـًٔا وَّلَا يَضُرُّكُمْ ۗ﴿۶۷﴾

67. ඔහු, 'එසේ නම් අල්ලාහ් හැර නුඹලාට යහපතක් හෝ නුඹලාට හානියක් කළ නොහැකි දේට නුඹලා නමස්කාර කරන්නෙහුද?'යි පැවසුවේය.

اُفٍّ لَّكُمْ وَلِمَا تَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ ۗ اَفَلَا تَعْقِلُوْنَ ﴿۶۸﴾

68. 'නුඹලාටද, අල්ලාහ් හැර නුඹලා නමදින දේටද අහෝ අවමානයයි! එසේ නම් නුඹලා තෙරුම් නොගන්නෙහුද?'

قَالُوْا حَرِّقُوْهُ وَانْصُرُوْٓا اٰلِهَتَكُمْ اِنْ كُنْتُمْ فٰعِلِيْنَ ﴿۶۹﴾

69. 'නුඹලා යමක් කිරීමට අදහස් කරන්නවුන් නම් ඔහුව පුළුස්සා නුඹලාගේ දෙවිවරුන්ට උදව් වනු'යි ඔවුහු කීහ.

قُلْنَا يٰنَارُ كُوْنِىْ بَرْدًا وَّسَلٰمًا عَلٰٓى اِبْرٰهِيْمَ ۙ﴿۷۰﴾

70. 'අහෝ ගින්න, සිසිල් වනු. එමෙන්ම ඉබ්රාහීම් කෙරෙහි ශාන්තියට ප්‍රභවයක් වනු'යි අපි කීවෙමු.

---

අවස්ථාව ගැන කරුණු හෙළිදරව් කිරීම සඳහාය. ඉබ්රාහීම් නබි තුමා ඔවුන්ගේ වැරදි විශ්වාසයට එරෙහිව ශක්තිමත් තර්කයක් ඉදිරිපත් කළා මිස ඔවුන්ව නොමග යැවීම සඳහා එතුමා සුළු තරමින්වත් කරුණු ඉදිරිපත් නොකළ බව අපගේ විශ්වාසයයි. මේ ආකාරයටම එකල විසූ ප්‍රතිමා පුදන්නන්ද මෙම කරුණු වටහා ගත්හ. ඉබ්රාහීම් නබි තුමාගේ එම කියමන ඇසූ ඔවුන්ගෙන් කිසිවෙක් එතුමා මුසාවාදියෙක් යැයි පැවසුවේ නැත. අල්කුර්ආනයට අනුව තමන්ගේ විශ්වාසයේ ඇති මෝඩ සිතිවිලි සම්බන්ධව විමසා බලන්නට සිදුවිය. (වගන්තිය 65 සිට 68 දක්වා බලන්න).

මෙහි තවත් දෙයක් ගැන මතක තබා ගත යුතුය. මෙම සිද්ධිය සිදුවීමට පෙර ඔවුන්ගේ පිළිමයන් කඩා බිඳ දැමීමට තමා අදිෂ්ඨාන කර ඇති බව ඉබ්රාහීම් නබි තුමා ඉතා ප්‍රකටව පවසා ඇත. (58 වැනි වගන්තිය බලන්න).

وَاَرَادُوْا بِهٖ كَيْدًا فَجَعَلْنٰهُمُ الْاَخْسَرِيْنَ ۚ ﴿٧١﴾

71. එමෙන්ම ඔවුහු ඔහුට නපුරු සැලැස්මක් කරන්නට අදහස් කළද අපි ඔවුන්ව අන්ත පරාජිතයින් බවට පත් කළෙමු.

وَنَجَّيْنٰهُ وَلُوْطًا اِلَى الْاَرْضِ الَّتِيْ بٰرَكْنَا فِيْهَا لِلْعٰلَمِيْنَ ﴿٧٢﴾

72. එමෙන්ම අපි ඔහුවද ලූත්වද බේරා ගෙන සියළු ජනතාවන් සඳහා අප ආශිර්වාද කළ එම භූමිය වෙතට (ඔවුන්ව ගෙන ආවෙමු).

وَوَهَبْنَا لَهٗۤ اِسْحٰقَ ؕ وَيَعْقُوْبَ نَافِلَةً ؕ وَكُلًّا جَعَلْنَا صٰلِحِيْنَ ﴿٧٣﴾

73. එමෙන්ම අපි ඔහුට ඉස්හාක්වද යඃකූබ්ව මුණුබුරෙකු ලෙසද පිරිනැමුවෙමු. එමෙන්ම අපි (ඔවුන්) සියල්ල ධාර්මිෂ්ඨකයින් කළෙමු.

وَجَعَلْنٰهُمْ اَئِمَّةً يَّهْدُوْنَ بِاَمْرِنَا وَاَوْحَيْنَاۤ اِلَيْهِمْ فِعْلَ الْخَيْرٰتِ وَاِقَامَ الصَّلٰوةِ وَاِيْتَآءَ الزَّكٰوةِ ۚ وَكَانُوْا لَنَا عٰبِدِيْنَ ۚۙ ﴿٧٤﴾

74. තවද අපි ඔවුන්ව නායකයින් කළෙමු. ඔවුන් අපගේ විධානයෙන් (මිනිසුන්ට) මග පෙන්වූහ. තවද යහපත් ක්‍රියාවන් කිරීමටද නැමදුමෙහි නිරතවීමටද zසකාත් (දුගී බද්ද) ගෙවීමටද (අණකරමින්) අපි ඔවුනට අනාවරණය කළෙමු. තවද ඔවුන් අප හට (පමණක්) නැමදුම් කරන්නන් වූහ.

وَلُوْطًا اٰتَيْنٰهُ حُكْمًا وَّعِلْمًا وَّنَجَّيْنٰهُ مِنَ الْقَرْيَةِ الَّتِيْ كَانَتْ تَّعْمَلُ الْخَبٰٓئِثَ ؕ اِنَّهُمْ كَانُوْا قَوْمَ سَوْءٍ فٰسِقِيْنَ ۙ ﴿٧٥﴾

75. තවද ලූත්ට අපි ප්‍රඥාවද දැනුමද දුන්නෙමු. තවද පිළිකුල් දේවල් වලින් යෙදී සිටි නගරයෙන් අපි ඔහුව මුදවා ගත්තෙමු. ඇත්තෙන්ම ඔවුන් දුෂ්ට (සහ) කැරලිකාර ජනතාවක් වූහ.

وَاَدْخَلْنٰهُ فِيْ رَحْمَتِنَا ؕ اِنَّهٗ مِنَ الصّٰلِحِيْنَ ۚ ﴿٧٦﴾ ع

76. තවද අපි ඔහුව අපගේ දයාවෙහි ඇතුළු කළෙමු. නියත වශයෙන්ම ඔහු ධාර්මිෂ්ඨකයින්ගෙන් (කෙනෙක්) විය.

وَنُوْحًا اِذْ نَادٰى مِنْ قَبْلُ فَاسْتَجَبْنَا لَهٗ فَنَجَّيْنٰهُ وَاَهْلَهٗ مِنَ الْكَرْبِ الْعَظِيْمِ ۚ ﴿٧٧﴾

77. තවද නූහ්, කලින් (අපට) හඬ ගැසූ අවස්ථාව (සිහිපත් කරන්න). තවද අපි ඔහුගේ අයැදීම පිළිගත්තෙමු. තවද ඔහුව සහ ඔහුගේ ජනතාව මහත් විපතින් මුදවා ගත්තෙමු.

وَنَصَرْنٰهُ مِنَ الْقَوْمِ الَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِنَا ؕ اِنَّهُمْ كَانُوْا قَوْمَ سَوْءٍ فَاَغْرَقْنٰهُمْ اَجْمَعِيْنَ ﴿٧٨﴾

78. තවද අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළ ජනතාවට එරෙහිව අපි ඔහුට උදව් කළෙමු. නියතවශයෙන්ම ඔවුන් නපුරු ජනතාවක් වූහ. එබැවින් අපි ඔවුන් සියල්ල ගිල්වා දැමුවෙමු.

وَدَاوٗدَ وَسُلَيْمٰنَ اِذْ يَحْكُمٰنِ فِى الْحَرْثِ اِذْ نَفَشَتْ فِيْهِ غَنَمُ الْقَوْمِ ۚ وَكُنَّا لِحُكْمِهِمْ شٰهِدِيْنَ ﴿٧٩﴾

79. තවද දාවුද් සහ සුලෙයිමාන්ව (සිහිපත් කරන්න). (එක්තරා) ජනතාවගේ බැටළුවන් රාත්‍රියෙහි අයාලේ ගොස් වගා බිම විනාශ කළ විට (එයට අදාළව) ඔවුන් විනිශ්චය දුන් අවස්ථාවේදී ඔවුන්ගේ විනිශ්චයට අපි සාක්ෂින් වූවෙමු.

فَفَهَّمْنٰهَا سُلَيْمٰنَ ۚ وَكُلًّا اٰتَيْنَا حُكْمًا وَّعِلْمًا ؗ وَّسَخَّرْنَا مَعَ دَاوٗدَ الْجِبَالَ يُسَبِّحْنَ وَالطَّيْرَ ؕ وَكُنَّا فٰعِلِيْنَ ﴿٨٠﴾

80. අපි සුලෙයිමාන්ට (එම විෂය සම්බන්ධව නිවැරදිව) අවබෝධ කර දුන්නෙමු. තවද ඔවුන්ගෙන් සෑම අයෙකුටම ප්‍රඥාවද දැනුමද දුන්නෙමු. තවද දාවුද් සමග දෙවියන්ගේ ප්‍රශංසාව සුවිශුද්ධ කිරීමට අපි කඳු සහ කුරුළු (වාසීන්ව)ද සේවය සඳහා යෙදෙව්වෙමු. තවද (එවන් සියළු දේ) කරන්නන් අපිම වෙමු.

وَعَلَّمْنٰهُ صَنْعَةَ لَبُوْسٍ لَّكُمْ لِتُحْصِنَكُمْ مِّنْۢ بَاْسِكُمْ ۚ فَهَلْ اَنْتُمْ شٰكِرُوْنَ ﴿٨١﴾

81. තවද අපි නුඹලා වෙනුවෙන් සන්නාහ කබායන් සෑදීමට ඔහුට ඉගැන්වීමු. එය නුඹලාගේ සටන්හි නුඹලාව ආරක්ෂා කරනු පිණිසය. එසේ නම් නුඹලා කෘතඥවන්තව සිටින්නෙහුද?

وَلِسُلَيْمٰنَ الرِّيْحَ عَاصِفَةً تَجْرِيْ بِاَمْرِهٖۤ اِلَى الْاَرْضِ الَّتِيْ بٰرَكْنَا فِيْهَا ؕ وَكُنَّا بِكُلِّ شَيْءٍ عٰلِمِيْنَ ﴿٨٢﴾

82. තවද (අපි) සුලෙයිමාන්ට සැඩ සුළඟ (සේවයට යටත් කළෙමු). එය ඔහුගේ අණ පරිදි අප ආශිර්වාද කළ භූමිය දෙසට හැමුවේය. තවද අපි සියළු දේ පිළිබඳව දැනුම ඇත්තන් වෙමු.

وَمِنَ الشَّيٰطِيْنِ مَنْ يَّغُوْصُوْنَ لَهٗ وَيَعْمَلُوْنَ عَمَلًا دُوْنَ ذٰلِكَ ۚ وَكُنَّا لَهُمْ

83. තවද කලහකාරීන්ගෙන් ඔහු සඳහා මුතු කිමිදෙන්නන්ද තවද ඒ හැර අනෙක් කාර්යය කරන්නන්ද (අපි සේවයට යටත් කළෙමු). තවද

حَٰفِظِينَ ﴿٨٢﴾

ඔවුන්ව සුපරීක්ෂා කරන්නන් අපිම වීමු.

وَأَيُّوبَ إِذْ نَادَىٰ رَبَّهُۥٓ أَنِّى مَسَّنِىَ ٱلضُّرُّ وَأَنتَ أَرْحَمُ ٱلرَّٰحِمِينَ ﴿٨٣﴾

84. තවද අය්යූබ් තම අධිපතියාණන් වෙත 'උවදුර මා වෙළාගෙන ඇත. ඔබ දයාව දක්වන සියල්ලන්ගෙන් වඩාත්ම දයාව දක්වන්නායැ'යි හඬ නගා කියූ එම අවස්ථාව (සිහිපත් කරන්න).

فَٱسْتَجَبْنَا لَهُۥ فَكَشَفْنَا مَا بِهِۦ مِن ضُرٍّ وَءَاتَيْنَٰهُ أَهْلَهُۥ وَمِثْلَهُم مَّعَهُمْ رَحْمَةً مِّنْ عِندِنَا وَذِكْرَىٰ لِلْعَٰبِدِينَ ﴿٨٤﴾

85. එබැවින් අපි ඔහුගේ අයැදීම පිළිගත්තෙමු. තවද ඔහු දුක් විඳු එම උවදුර ඔහුගෙන් ඉවත් කළෙමු. තවද අපි ඔහුට ඔහුගේ පවුලේ අයව දුනිමු. තවද ඔවුන් හැරෙන්නට අප වෙතින් දයාවක් ලෙස තවත් (දුනිමු). තවද (මෙම සිද්ධිය) නමදින්නන් හට සිහිකිරීමක් ලෙස (කළෙමු).

وَإِسْمَٰعِيلَ وَإِدْرِيسَ وَذَا ٱلْكِفْلِ ۖ كُلٌّ مِّنَ ٱلصَّٰبِرِينَ ﴿٨٥﴾

86. එමෙන්ම ඉස්මාඊල්වද ඉද්රීස්වද zදුල්කිෆ්ල්වද (සිහිපත් කරන්න). සියල්ල ඉවසිලිවන්තයින්ගෙන් වූහ.

وَأَدْخَلْنَٰهُمْ فِى رَحْمَتِنَآ ۖ إِنَّهُم مِّنَ ٱلصَّٰلِحِينَ ﴿٨٦﴾

87. තවද අපි ඔවුන්ව අපගේ දයාවෙහි ඇතුළු කළෙමු. නියතවශයෙන්ම ඔවුන් ධාර්මිෂ්ඨකයින්ගෙන් වූහ.

وَذَا ٱلنُّونِ إِذ ذَّهَبَ مُغَٰضِبًا فَظَنَّ أَن لَّن نَّقْدِرَ عَلَيْهِ فَنَادَىٰ فِى ٱلظُّلُمَٰتِ أَن لَّآ إِلَٰهَ إِلَّآ أَنتَ سُبْحَٰنَكَ إِنِّى كُنتُ مِنَ ٱلظَّٰلِمِينَ ﴿٨٧﴾

88. තවද zදුන්නූන්, ඔහු කෝපාවිෂ්ටව පිටව ගිය එම අවස්ථාව (සිහිපත් කරන්න). තවද අප ඔහුමත දැඩි පීඩාවක් ඇති නොකරන්නේ යැයි ඔහු සිතුවේය. පසුව ඔහු අන්ධකාරයේ ගැඹුරෙහි සිට, 'ඔබ හැර නැමදීමට සුදුස්සෙකු අන් කිසිවෙක් නොමැත. ඔබ පරිශුද්ධය. ඇත්තෙන්ම මම වරදකරුවන්ගෙන් වූවෙමි'යි හඬ නගා කීවේය.

فَٱسْتَجَبْنَا لَهُۥ وَنَجَّيْنَٰهُ مِنَ ٱلْغَمِّ ۚ وَكَذَٰلِكَ نُۨجِى ٱلْمُؤْمِنِينَ ﴿٨٨﴾

89. එබැවින් අපි ඔහුගේ අයැදීම පිළිගත්තෙමු. තවද ඔහුව උවදුරින් මුදවා ගත්තෙමු. තවද මෙයාකාරයට අපි විශ්වාසිතයින්ව මුදවා ගන්නෙමු.

وَزَكَرِيَّآ إِذْ نَادَىٰ رَبَّهُۥ رَبِّ لَا تَذَرْنِى فَرْدًا وَأَنتَ خَيْرُ ٱلْوَٰرِثِينَ ﴿٩٠﴾

90. එමෙන්ම zසකරිය්යා ඔහුගේ අධිපතියාණන් වෙත 'මාගේ අධිපතියාණෙනි! මා (දරුවල රහිතව) තනි නොකරනු මැනව. තවද උරුමක්කාරයින්ගෙන් ඉතාමත් ශ්‍රේෂ්ඨයා ඔබමැ'යි හඬ නගා කියූ අවස්ථාව (සිහිකරන්න).

فَٱسْتَجَبْنَا لَهُۥ وَوَهَبْنَا لَهُۥ يَحْيَىٰ وَأَصْلَحْنَا لَهُۥ زَوْجَهُۥٓ ۚ إِنَّهُمْ كَانُوا۟ يُسَٰرِعُونَ فِى ٱلْخَيْرَٰتِ وَيَدْعُونَنَا رَغَبًا وَرَهَبًا ۖ وَكَانُوا۟ لَنَا خَٰشِعِينَ ﴿٩١﴾

91. එබැවින් අපි ඔහුගේ අයැදීම පිළිගත්තෙමු. තවද ඔහුට යහ්යාව පිරිනැමුවෙමු. තවද ඔහුගේ බිරිඳව ඔහු සඳහා සුව කළෙමු. නියතවශයෙන්ම ඔවුහු යහපත් ක්‍රියාවන්හි එකිනෙකා අතර යුහුසුළුව තරඟ කරමින් සිටියෝය. තවද ඔවුහු අපේක්ෂාවෙන් සහ බියෙන් අපව කැඳවූහ. තවද ඔවුන් අප ඉදිරියෙහි නිහතමානි වූහ.

وَٱلَّتِىٓ أَحْصَنَتْ فَرْجَهَا فَنَفَخْنَا فِيهَا مِن رُّوحِنَا وَجَعَلْنَٰهَا وَٱبْنَهَآ ءَايَةً لِّلْعَٰلَمِينَ ﴿٩٢﴾

92. තවද තම පතිවත රැක ගත් ඇයවත් (සිහිපත් කරන්න). එබැවින් අපගේ වදන ඇය තුළට අපි පිඹුවෙමු. තවද අපි ඇයවද ඇයගේ පුත්‍රයාවද සකල ජනතාවන්ට සළකුණක් කළෙමු.

إِنَّ هَٰذِهِۦٓ أُمَّتُكُمْ أُمَّةً وَٰحِدَةً وَأَنَا۠ رَبُّكُمْ فَٱعْبُدُونِ ﴿٩٣﴾

93. සැබැවින්ම නුඹලාගේ මෙම ජනතාව, එකම ජනතාවයි. එමෙන්ම මම නුඹලාගේ අධිපතියාණන් වෙමි. එබැවින් මා නමදිනු.

وَتَقَطَّعُوٓا۟ أَمْرَهُم بَيْنَهُمْ ۖ كُلٌّ إِلَيْنَا رَٰجِعُونَ ﴿٩٤﴾

94. නමුත් ඔවුහු ඔවුන්ගේ ක්‍රියා මාර්ගය ඔවුනතරම භේදබින්න කර ගත්හ. තවද සියල්ලන්ම අප වෙත ආපසු පැමිණෙන්නෝමය.

فَمَن يَعْمَلْ مِنَ ٱلصَّٰلِحَٰتِ وَهُوَ مُؤْمِنٌ فَلَا كُفْرَانَ لِسَعْيِهِۦ وَإِنَّا لَهُۥ كَٰتِبُونَ ﴿٩٥﴾

95. එබැවින් යමෙක් විශ්වාසිතයෙකුව සිටියදී යහපත් ක්‍රියාවන් කරන්නේද, ඔහුගේ ප්‍රයත්නය අගය නොකොට නොහරින්නේය. තවද අපි සැබැවින්ම එය වාර්තා කරන්නන් වන්නෙමු.

وَحَرَٰمٌ عَلَىٰ قَرْيَةٍ أَهْلَكْنَٰهَآ أَنَّهُمْ لَا يَرْجِعُونَ ﴿٩٦﴾

96. තවද අප කිසිදු නගරයක් එය විනාශ කළ පසු එහි අය නැවත නොපැමිණීම වැළැක්විය නොහැකි නියමයකි.

97. යඃජුජ් සහ මඃජුජ් මුදා හරිනු ලබන විට ඔවුන් සියළු උස් තැනින් කඩිනම්ව ඉදිරියට එනු ඇත.

حَتَّىٰٓ إِذَا فُتِحَتْ يَأْجُوجُ وَمَأْجُوجُ
وَهُم مِّن كُلِّ حَدَبٍ يَنسِلُونَ ﴿٩٧﴾

98. තවද සත්‍ය පොරොන්දුව සමීපවන කල්හි, අවිශ්වාස කළ අයගේ ඇස් එසැනින්ම නිසොල්මන්ව තිබෙනු ඇත. (තවද ඔවුහු මෙසේ කියන්නෝය). 'අහෝ! අපට වූ විපත! මේ ගැන අපි ඇත්තෙන්ම නොසැළකිලිමත් වූවෙමු. එපමණක් නොව, අපි වරදකරුවන්ද වූවෙමු'.

وَاقْتَرَبَ الْوَعْدُ الْحَقُّ فَإِذَا هِيَ شَاخِصَةٌ
أَبْصَارُ الَّذِينَ كَفَرُوا يَا وَيْلَنَا قَدْ كُنَّا فِي
غَفْلَةٍ مِّنْ هَٰذَا بَلْ كُنَّا ظَالِمِينَ ﴿٩٨﴾

99. 'නියතවශයෙන්ම නුඹලාද අල්ලාහ් හැර නුඹලා නමදින දේද නිරයේ ඉන්ධන වේ. නුඹලා (සියල්ලම) එහි පිවිසෙන්නෝමය'.

إِنَّكُمْ وَمَا تَعْبُدُونَ مِن دُونِ اللَّهِ
حَصَبُ جَهَنَّمَ أَنتُمْ لَهَا وَارِدُونَ ﴿٩٩﴾

100. මේවා දෙවිවරුන් වූවා නම් ඔවුන් එහි නොපිවිසෙනු ඇත. තවද සියල්ලම එහි දිගුකල් වාසය කරනු ඇත.

لَوْ كَانَ هَٰؤُلَاءِ آلِهَةً مَّا وَرَدُوهَا وَكُلٌّ
فِيهَا خَالِدُونَ ﴿١٠٠﴾

101. එහිදී ඔවුන්ට හඬා වැලපීම ඇත්තන්නේය. තවද ඔවුන් එහි (වෙන කිසිවක්) නොඇසන්නෝය.

لَهُمْ فِيهَا زَفِيرٌ وَهُمْ فِيهَا لَا يَسْمَعُونَ ﴿١٠١﴾

102. (නමුත්) යහපත් තිළිණයේ (පොරොන්දුව) කලින් අප වෙතින් ලත් අය ගත්කල, ඔවුන් එයින් ඈත් කරනු ලබන්නෝය.

إِنَّ الَّذِينَ سَبَقَتْ لَهُم مِّنَّا الْحُسْنَىٰٓ
أُولَٰٓئِكَ عَنْهَا مُبْعَدُونَ ﴿١٠٢﴾

103. ඔවුහු එහි සිහින් හඬක්වත් නොඇසන්නෝය. තවද ඔවුන් තමන්ගේ ආත්මයන් ප්‍රියකරන දෑහි දිගුකල් වෙසෙන්නෝය.

لَا يَسْمَعُونَ حَسِيسَهَا وَهُمْ فِي مَا
اشْتَهَتْ أَنفُسُهُمْ خَالِدُونَ ﴿١٠٣﴾

104. මහත් වූ භීතිය ඔවුන්ව දුකට පත්නොකරන්නේය. තවද 'නුඹලාට පොරොන්දු වූ නුඹලාගේ දිනය මෙය වේ යැ'යි (පවසමින්) සුරදූතයින් ඔවුන්ව හමුවන්නෝය.

لَا يَحْزُنُهُمُ الْفَزَعُ الْأَكْبَرُ وَتَتَلَقَّاهُمُ
الْمَلَٰٓئِكَةُ هَٰذَا يَوْمُكُمُ الَّذِي كُنتُمْ
تُوعَدُونَ ﴿١٠٤﴾

105. ලියන ලද රෝල් කොළ ඔතනවාක් මෙන් අපි අහස ඔතන්නා වූ එම දිනය (සිහිපත් කරන්න). අප පළමු මැවීම ආරම්භ කළා සේ අපි එය නැවතත් කරන්නෙමු. එය අප කෙරෙහි (බැඳී ඇති) පොරොන්දුවකි. අපි නිශ්චිතවම එය ඉටුකරන්නෙමු.

يَوْمَ نَطْوِي السَّمَآءَ كَطَيِّ السِّجِلِّ لِلْكُتُبِ ؕ كَمَا بَدَاْنَاۤ اَوَّلَ خَلْقٍ نُّعِيْدُهٗ ؕ وَعْدًا عَلَيْنَا ؕ اِنَّا كُنَّا فٰعِلِيْنَ ﴿١٠٥﴾

106. මාගේ ධාර්මිෂ්ඨ දාසයින් භූමිය උරුමකරගන්නෝ යැයි (දාවුද්ගේ) ගීතිකාවෙහි අනුශාසනාවෙන් පසු අපි ලියා ඇත්තෙමු.

وَلَقَدْ كَتَبْنَا فِي الزَّبُوْرِ مِنْۢ بَعْدِ الذِّكْرِ اَنَّ الْاَرْضَ يَرِثُهَا عِبَادِيَ الصّٰلِحُوْنَ ﴿١٠٦﴾

107. මෙහි නියතවශයෙන්ම (දෙවියන්ට) නමදින ජනතාවට වැදගත් පණිවිඩයක් ඇත.

اِنَّ فِيْ هٰذَا لَبَلٰغًا لِّقَوْمٍ عٰبِدِيْنَ ﴿١٠٧﴾ ؕ

108. තවද අපි ඔබව සියළුම ජනතාවට දයාවක් ලෙස මිස නොඑව්වේමු.

وَمَاۤ اَرْسَلْنٰكَ اِلَّا رَحْمَةً لِّلْعٰلَمِيْنَ ﴿١٠٨﴾

109. 'නියතවශයෙන්ම නුඹලාගේ දෙවියන් එකම දෙවියන්ම යැයි මා අනාවරණය කරන ලද්දෙමි. එසේ නම් නුඹලා අවනත වන්නෙහුදෑ?'යි පවසන්න.

قُلْ اِنَّمَا يُوْحٰۤى اِلَيَّ اَنَّمَاۤ اِلٰهُكُمْ اِلٰهٌ وَّاحِدٌ ۚ فَهَلْ اَنْتُمْ مُّسْلِمُوْنَ ﴿١٠٩﴾

110. නමුත් ඔවුන් පිටුපා යන්නේ නම්, පවසන්න, 'මම නුඹලා සියල්ලන්ට එකසේ අවවාද කර ඇත්තෙමි. නුඹලාට පොරොන්දු වූ දේ සමීපයෙහිද නැතහොත් දුරස්ථයෙහි දැයි මම නොදන්නෙමි'.

فَاِنْ تَوَلَّوْا فَقُلْ اٰذَنْتُكُمْ عَلٰى سَوَآءٍ ؕ وَاِنْ اَدْرِيْۤ اَقَرِيْبٌ اَمْ بَعِيْدٌ مَّا تُوْعَدُوْنَ ﴿١١٠﴾

111. 'සැබැවින්ම උස් හඬින් කථාකරන දෙය ඔහු දන්නේය. තවද නුඹලා සඟවන දෙයද ඔහු දන්නේය'.

اِنَّهٗ يَعْلَمُ الْجَهْرَ مِنَ الْقَوْلِ وَيَعْلَمُ مَا تَكْتُمُوْنَ ﴿١١١﴾

112. 'තවද එය නුඹලාට පිරික්සුමක් වීමටද, ටික කලෙකට භුක්ති විඳීමක් (පමණක්)ද යන්න මම නොදනිමි'.

وَاِنْ اَدْرِيْ لَعَلَّهٗ فِتْنَةٌ لَّكُمْ وَمَتَاعٌ اِلٰى حِيْنٍ ﴿١١٢﴾

113. ඔහු(වක්තෘවරයා), 'මාගේ අධිපතියාණෙනි! සත්‍යය සමග ඔබ

قٰلَ رَبِّ احْكُمْ بِالْحَقِّ ؕ وَرَبُّنَا

الرَّحۡمٰنُ الۡمُسۡتَعَانُ عَلٰى مَا تَصِفُوۡنَ ۝١١٢

විනිශ්චය කරනු මැනව. අපගේ අධිපතියාණන් මහා කාරුණික (දෙවියන්)ය. (අවිශ්වාසිතයිනි) නුඹලා ගොතන දෙයට එරෙහිව ඔහුගෙන් පිහිට පැතිය යුතු වේ'යැයි පැවසුවේය.




## අල් හජ්

(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا النَّاسُ اتَّقُوْا رَبَّكُمْ ۚ اِنَّ زَلْزَلَةَ السَّاعَةِ شَیْءٌ عَظِيْمٌ ②

2. එම්බල ජනතාවනි! නුඹලාගේ අධිපතියාණන්ට බියබැතිමත් වනු. නියතවශයෙන්ම නියමිත හෝරාවේ කම්පනය අති භයානක දෙයකි.

يَوْمَ تَرَوْنَهَا تَذْهَلُ كُلُّ مُرْضِعَةٍ عَمَّاۤ اَرْضَعَتْ وَتَضَعُ كُلُّ ذَاتِ حَمْلٍ حَمْلَهَا وَتَرَى النَّاسَ سُكٰرٰى وَمَا هُمْ بِسُكٰرٰى وَلٰكِنَّ عَذَابَ اللّٰهِ شَدِيْدٌ ③

3. නුඹලා එය දකින එම දිනයේ, කිරිපොවන සෑම මවක්ම තම කිරිදරුවාව අමතක කරන්නීය. තවද සෑම ගැබිණි ස්ත්‍රියක්ම ඇයගේ ගැබ්බර ගබ්සා කරගන්නීය. තවද සෑම මිනිසෙකුවම, ඔවුන් මත් නොවුවද මත් වූවන් සේ නුඹලා දකින්නෙහුය. නමුත් අල්ලාහ්ගේ දඬුවම ඉතා දැඩි වන්නේය.

وَمِنَ النَّاسِ مَنْ يُّجَادِلُ فِى اللّٰهِ بِغَيْرِ عِلْمٍ وَّيَتَّبِعُ كُلَّ شَيْطٰنٍ مَّرِيْدٍ ④

4. තවද මිනිසුන් අතර සමහරුන් දැනුමකින් තොරව අල්ලාහ් සම්බන්ධව වාද කරති. තවද ඔවුන් සෑම කැරළිකාර ෂෙයිතාන්ව පිළිපදිති.

كُتِبَ عَلَيْهِ اَنَّهٗ مَنْ تَوَلَّاهُ فَاَنَّهٗ يُضِلُّهٗ وَيَهْدِيْهِ اِلٰى عَذَابِ السَّعِيْرِ ⑤

5. කවුරුන් හෝ ඔහු(ෂෙයිතාන්) සමග මිත්‍ර වන්නේද, ඔහු හෙතෙමව නොමග යවා නිරා ගින්නේ දඬුවම කරා හෙතෙමව යොමු කරන්නේයැයි ඔහු පිළිබඳව තීරණය කරන ලදී.

يٰۤاَيُّهَا النَّاسُ اِنْ كُنْتُمْ فِیْ رَيْبٍ مِّنَ الْبَعْثِ فَاِنَّا خَلَقْنٰكُمْ مِّنْ تُرَابٍ ثُمَّ مِنْ نُّطْفَةٍ ثُمَّ مِنْ عَلَقَةٍ ثُمَّ مِنْ مُّضْغَةٍ مُّخَلَّقَةٍ وَّغَيْرِ مُخَلَّقَةٍ لِّنُبَيِّنَ لَكُمْ ؕ

6. එම්බල ජනතාවනි! නුඹලා පුනරුත්ථානය පිළිබඳව සැකයෙහි නම්, (මෙසේ මෙනෙහි කරනු.) ඇත්තෙන්ම අපි නුඹලාව දූවිලි පසින්ද පසුව ශුක්‍රාණු බිඳුවෙන්ද පසුව ලේ කැටියෙන්ද පසුව අඩක් හැඩගැසුනු අඩක් හැඩ නොගැසුනු මාංශ පිඩුවකින්ද මැව්වේ (අපගේ බලය) අප නුඹලාට පැහැදිලි කරනු පිණිසය. තවද අපි කැමති දේ

* නියමිත කාලයක් සඳහා ගැබ්හි රඳවා තබන්නෙමු. පසුව අපි නුඹලාව බිළිඳෙකු ලෙස පිට කරන්නෙමු. ඉන්පසු නුඹලා නුඹලාගේ සම්පූර්ණ පරිණතභාවයට එළඹෙන්නෙහුය. පසුව නුඹලා අතරින් සමහරුන් මරණයට පත්වන අතර නුඹලා අතරින් සමහරුන් වයසින් ඉතා මුහුකුරා ගිය නිසා ඔවුන් සියළු දැනුම (ලැබුවායින්) පසුව එය අහිමි කරගත් තත්ත්වයට යළිත් පත්වන්නෝය. එමෙන්ම නුඹලා පොළොව අප්‍රාණිකව දකින්නෙහුය. නමුත් අපි එය මත ජලය පහළ කළ විට එය ප්‍රබෝධමත් වී විකසිත වේ. තවද සෑම වර්ගයකම අලංකාරවත් ගස්වැල් වැවෙන්නට සලස්වන්නේය.

وَنُقِرُّ فِي الْأَرْحَامِ مَا نَشَاءُ إِلَىٰ أَجَلٍ مُسَمًّى ثُمَّ نُخْرِجُكُمْ طِفْلًا ثُمَّ لِتَبْلُغُوا أَشُدَّكُمْ ۖ وَمِنْكُمْ مَنْ يُتَوَفَّىٰ وَمِنْكُمْ مَنْ يُرَدُّ إِلَىٰ أَرْذَلِ الْعُمُرِ لِكَيْلَا يَعْلَمَ مِنْ بَعْدِ عِلْمٍ شَيْئًا ۚ وَتَرَى الْأَرْضَ هَامِدَةً فَإِذَا أَنْزَلْنَا عَلَيْهَا الْمَاءَ اهْتَزَّتْ وَرَبَتْ وَأَنْبَتَتْ مِنْ كُلِّ زَوْجٍ بَهِيجٍ ﴿٦﴾

7. එයට හේතුව පරම සත්‍යය අල්ලාහ්ය. තවද මළවුන්ට ජීවය දෙන්නේ ඔහුය. තවද ඔහු සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

ذَٰلِكَ بِأَنَّ اللَّهَ هُوَ الْحَقُّ وَأَنَّهُ يُحْيِي الْمَوْتَىٰ وَأَنَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٧﴾

8. තවද එම හෝරාව නිශ්චිතවම පැමිණෙන්නේය. ඒ ගැන කිසිදු සැකයක් නැත. තවද අල්ලාහ් නියතවශයෙන්ම සොහොන්හි ඇති අයව නැවත නැගිටුවන්නේය.

وَأَنَّ السَّاعَةَ آتِيَةٌ لَا رَيْبَ فِيهَا وَأَنَّ اللَّهَ يَبْعَثُ مَنْ فِي الْقُبُورِ ﴿٨﴾

9. තවද කිසිදු දැනුමක් නොමැතිවද, කිසිදු මග පෙන්වීමක් නොමැතිවද, දීප්තිමත් පුස්තකයක් නොමැතිවද, අල්ලාහ් සම්බන්ධව වාද කරන අය මිනිසුන් අතර වෙති.

وَمِنَ النَّاسِ مَنْ يُجَادِلُ فِي اللَّهِ بِغَيْرِ عِلْمٍ وَلَا هُدًى وَلَا كِتَابٍ مُنِيرٍ ﴿٩﴾

10. අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) නොමග යවනු පිණිස (ඔහු උඩඟු ලෙස) තම පැත්ත හරවන්නේය. ඔහුට මෙලොවෙහිදි නින්දාව ඇත. තවද පුනරුත්ථාන

ثَانِيَ عِطْفِهِ لِيُضِلَّ عَنْ سَبِيلِ اللَّهِ ۖ لَهُ فِي الدُّنْيَا خِزْيٌ ۖ وَنُذِيقُهُ يَوْمَ الْقِيَامَةِ

* සටහන. 6: මෙහි භාවිතා කර ඇති 'යළිත් පත්වන්නෝය' යන වචනයෙන් පෙන්නුම් කරන්නේ බිළිඳෙක් මුල සිටම තමා විසින් තමාවම රැක බලා ගත නොහැකි පරිදිම, මුහුකුරා ගිය මිනිසෙක් එම තත්ත්වයටම යළි පිවිසෙන බවයි. මේ සම්බන්ධව අල් කුර්ආනයේ යාසීන් පරිච්ඡේදයේ 69 වැනි වගන්තියෙන් සනාථ වේ.

عَذَابَ الْحَرِيقِ ﴿١٠﴾

දිනයේදී ඔහුට දැවෙන දඬුවම විඳින්නට අපි සලස්වන්නෙමු.

ذَٰلِكَ بِمَا قَدَّمَتْ يَدَاكَ وَأَنَّ اللَّهَ لَيْسَ بِظَلَّامٍ لِّلْعَبِيدِ ﴿١١﴾ ع

11. මෙය නුඹගේ අත් පෙර යවා ඇති දේ නිසා (යැයි කියනු ලැබේ). තවද අල්ලාහ් (තම) දාසයින් හට ආසාධාරණ කරන්නෙකු නොවේ.

وَمِنَ النَّاسِ مَن يَعْبُدُ اللَّهَ عَلَىٰ حَرْفٍ ۖ فَإِنْ أَصَابَهُ خَيْرٌ اطْمَأَنَّ بِهِ ۖ وَإِنْ أَصَابَتْهُ فِتْنَةٌ انقَلَبَ عَلَىٰ وَجْهِهِ خَسِرَ الدُّنْيَا وَالْآخِرَةَ ۚ ذَٰلِكَ هُوَ الْخُسْرَانُ الْمُبِينُ ﴿١٢﴾

12. තවද මිනිසුන් අතර (විශ්වාසයේ) මායිමෙහි සිට අල්ලාහ්ට නමදින අයද වේ. පසුව ඔහුට යහපතක් සිදු වන විට ඔහු ඒ පිළිබඳව තෘප්තිමත් වෙයි. තවද ඔහුට පිරික්සුමක් අත් වන විට ඔහු (අල්ලාහ්ගෙන්) ඉවත හැරෙයි. ඔහු මෙලොවෙහිදී මෙන්ම පරලොවෙහිදීද පාඩු විඳින්නේය. එය පැහැදිලි පාඩුවකි.

يَدْعُوا مِن دُونِ اللَّهِ مَا لَا يَضُرُّهُ وَمَا لَا يَنفَعُهُ ۚ ذَٰلِكَ هُوَ الضَّلَالُ الْبَعِيدُ ﴿١٣﴾

13. අල්ලාහ් හැර ඔහු, තමාට හානියක් කළ නොහැකි එමෙන්ම තමාට ප්‍රයෝජන විය නොහැකි දේ කැඳවන්නේය. ඇත්තෙන්ම එය ඈත්වූ දුර් මාර්ගයයි.

يَدْعُوا لَمَن ضَرُّهُ أَقْرَبُ مِن نَّفْعِهِ ۚ لَبِئْسَ الْمَوْلَىٰ وَلَبِئْسَ الْعَشِيرُ ﴿١٤﴾

14. සිය ප්‍රයෝජනයට වඩා සිය හානිය සමීපයෙහි ඇති අයෙකුව ඔහු කැඳවන්නේය. එම රැකවලා ඇත්තෙන්ම නපුරුය. තවද එම සහායකයා ඇත්තෙන්ම නපුරුය.

إِنَّ اللَّهَ يُدْخِلُ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ ۚ إِنَّ اللَّهَ يَفْعَلُ مَا يُرِيدُ ﴿١٥﴾

15. විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අයව නියතවශයෙන්ම අල්ලාහ් උද්‍යානයන්හි ඇතුළු කරවන්නේය. ඒ යටින් ගංගාවල් ගලා බසිති. නියතවශයෙන්ම අල්ලාහ්, ඔහු අභිමත දේ කරයි.

مَن كَانَ يَظُنُّ أَن لَّن يَنصُرَهُ اللَّهُ فِي الدُّنْيَا وَالْآخِرَةِ فَلْيَمْدُدْ بِسَبَبٍ إِلَى السَّمَاءِ ثُمَّ

16. අල්ලාහ් ඔහුට(දූතයාණන්හට) මෙලොවෙහිත් පරලොවෙහිත් උදව් නොකරන්නේ යැයි යමෙක් සිතන්නේ නම්, (ඔහු හැකි නම්) අහස වෙතට

لِيَقْطَعْ فَلْيَنْظُرْ هَلْ يُذْهِبَنَّ كَيْدُهٗ
مَا يَغِيْظُ ١٦

මගක් සොයා ගනිත්වා. තවද (එම දේව පිහිට) විසන්ධි කරත්වා. පසුව ඔහුගේ උපාය (ඔහුව) කෝපයට පත් කරන දේ ඉවත්කරන්නේ දැයි ඔහු බලත්වා.

وَكَذٰلِكَ اَنْزَلْنٰهُ اٰيٰتٍۢ بَيِّنٰتٍۙ وَّاَنَّ اللّٰهَ
يَهْدِيْ مَنْ يُّرِيْدُ ١٧

17. තවද මෙයාකාරයට අපි ප්‍රකට සළකුණු වශයෙන් මෙය (කුර්ආනය) පහළ කර ඇත්තෙමු. තවද නියතවශයෙන්ම අල්ලාහ්, ඔහු අභිමත අයට මග පෙන්වන්නේය.

اِنَّ الَّذِيْنَ اٰمَنُوْا وَالَّذِيْنَ هَادُوْا وَالصّٰبِـِٕيْنَ
وَالنَّصٰرٰى وَالْمَجُوْسَ وَالَّذِيْنَ اَشْرَكُوْٓا ۖ
اِنَّ اللّٰهَ يَفْصِلُ بَيْنَهُمْ يَوْمَ الْقِيٰمَةِ ۗ
اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَيْءٍ شَهِيْدٌ ١٨

18. විශ්වාස කළ අයද යුදෙව්වන්ද සාබිඊන්ද කිතුනුවන්ද මජුසිවරුන්ද (අල්ලාහ්ට) සමාන තබන්නන්ද ගත්කල, නියතවශයෙන්ම අල්ලාහ් ඔවුනතර පුනරුත්ථාන දිනයේදී විනිශ්චය කරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේ කෙරෙහි සාක්ෂිකරුය.

اَلَمْ تَرَ اَنَّ اللّٰهَ يَسْجُدُ لَهٗ مَنْ فِي السَّمٰوٰتِ
وَمَنْ فِي الْاَرْضِ وَالشَّمْسُ وَالْقَمَرُ
وَالنُّجُوْمُ وَالْجِبَالُ وَالشَّجَرُ
وَالدَّوَآبُّ وَكَثِيْرٌ مِّنَ النَّاسِ ۗ وَكَثِيْرٌ
حَقَّ عَلَيْهِ الْعَذَابُ ۗ وَمَنْ يُّهِنِ اللّٰهُ فَمَا لَهٗ
مِنْ مُّكْرِمٍ ۗ اِنَّ اللّٰهَ يَفْعَلُ مَا يَشَآءُ ١٩ ۩

19. අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද හිරුද සඳුද තාරකාද කඳුද ගස්ද සතුන්ද මනුෂ්‍යයන්ගෙන් බොහෝ අයද අල්ලාහ්ට අවනත වනු ඔබ නොදුටුවෙහිද? නමුත් බොහෝ අය දඬුවම් ලැබීමට සුදුස්සන් වී සිටිති. එමෙන්ම අල්ලාහ් යමෙකුව නින්දාවට පත්කරන්නේද, කිසිවෙකුටත් ඔහුව ගරුත්වයට පත්කළ නොහැක. ඇත්තෙන්ම අල්ලාහ්, ඔහු අභිමත දේ කරන්නේය.

هٰذٰنِ خَصْمٰنِ اخْتَصَمُوْا فِيْ رَبِّهِمْ ۡ
فَالَّذِيْنَ كَفَرُوْا قُطِّعَتْ لَهُمْ ثِيَابٌ مِّنْ
نَّارٍ ۗ يُصَبُّ مِنْ فَوْقِ رُءُوْسِهِمُ
الْحَمِيْمُ ٢٠

20. මේ දෙදෙනා තමන්ගේ අධිපතියාණන් සම්බන්ධව වාද කරන්නන් දෙදෙනෙකි. අවිශ්වාසිත අය ගත්කල ඔවුනට ගිනි වස්ත්‍රයන් කපා සකසනු ලැබේ. තවද උතුරන්නාවූ ජලය ඔවුන්ගේ හිස් මත වත්කරනු ලැබේ.

| | |
|---|---|
| 21. එමගින් ඔවුන්ගේ කුස් තුළ ඇති දේද (ඔවුන්ගේ) සම්ද උණු වී දිය වනු ඇත. | يُصْهَرُ بِهِ مَا فِي بُطُونِهِمْ وَالْجُلُودُ ﴿٢١﴾ |
| 22. එමෙන්ම ඔවුනට (දඬුවම් කිරීම සඳහා) යකඩ අත් මුගුරුද ඇත. | وَلَهُم مَّقَامِعُ مِنْ حَدِيدٍ ﴿٢٢﴾ |
| 23. ඔවුන් උග්‍ර වේදනාවෙන් එයින් පිටත්වීමට තැත් කරන සෑමවිටම ඔවුන් නැවතත් ඒ වෙතටම හරවනු ලබන්නෝය. තවද 'දැවෙන්නාවූ දඬුවම විඳිනු'! (යි ඔවුනට කියනු ලබන්නේය). | كُلَّمَا أَرَادُوا أَن يَخْرُجُوا مِنْهَا مِنْ غَمٍّ أُعِيدُوا فِيهَا وَذُوقُوا عَذَابَ الْحَرِيقِ ﴿٢٣﴾ |
| 24. එහෙත් විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අයව අල්ලාහ් උද්‍යානයන්හි ඇතුළු කරවන්නේය. ඒ යටින් ගංගාවල් ගලා බසිති. එහිදී ඔවුන් රන් වළලු සමග මුතු වලින්ද පළඳවනු ලබන්නෝය. තවද ඔවුන්ගේ වස්ත්‍රය එහි සේදයෙන් වනු ඇත. | إِنَّ اللَّهَ يُدْخِلُ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ يُحَلَّوْنَ فِيهَا مِنْ أَسَاوِرَ مِن ذَهَبٍ وَلُؤْلُؤًا ۖ وَلِبَاسُهُمْ فِيهَا حَرِيرٌ ﴿٢٤﴾ |
| 25. තවද ඔවුන් පිවිතුරු වදන් වෙත මග පෙන්වනු ලබන්නෝය. එමෙන්ම ඔවුන් ප්‍රසංශා හිමි (දෙවියන්)ගේ මාර්ගය වෙතට මග පෙන්වනු ලබන්නෝය. | وَهُدُوا إِلَى الطَّيِّبِ مِنَ الْقَوْلِ وَهُدُوا إِلَىٰ صِرَاطِ الْحَمِيدِ ﴿٢٥﴾ |
| 26. අවිශ්වාස කළ අයටද අල්ලාහ්ගේ මාර්ගයෙන් හා (කඃබාව) එහි රැඳී සිටින්නන්ටත් පිටිසරින් පැමිණි ආගන්තුකයින්ටත් සියලු මිනිසුන්ටත් අප එක හා සමානව පත් කර ඇති ශුද්ධවූ නැමදුම් ස්ථානයෙන් (මිනිසුන්ව) වළක්වන අයටද එමෙන්ම එහි කවරෙකු අයුක්තිගරුකව යම් අපරාධයක් කිරීමට තැත් කරන්නේද ඔහුටද අපි වේදනීය දඬුවමක් විඳීමට සලස්වන්නෙමු. | إِنَّ الَّذِينَ كَفَرُوا وَيَصُدُّونَ عَن سَبِيلِ اللَّهِ وَالْمَسْجِدِ الْحَرَامِ الَّذِي جَعَلْنَاهُ لِلنَّاسِ سَوَاءً الْعَاكِفُ فِيهِ وَالْبَادِ ۚ وَمَن يُرِدْ فِيهِ بِإِلْحَادٍ بِظُلْمٍ نُّذِقْهُ مِنْ عَذَابٍ أَلِيمٍ ﴿٢٦﴾ |
| 27. තවද අප ඉබ්රාහිම්ට නිවසේ ස්ථානයක් වෙන් කර (මෙසේ පැවසූ) අවස්ථාව (සිහිපත් කරන්න). 'මා හට කිසිවක් සමාන නොතබන්න. | وَإِذْ بَوَّأْنَا لِإِبْرَاهِيمَ مَكَانَ الْبَيْتِ أَن لَّا تُشْرِكْ بِي شَيْئًا وَطَهِّرْ بَيْتِيَ لِلطَّائِفِينَ |

وَالْقَآئِمِينَ وَالرُّكَّعِ السُّجُودِ ﴿٢٧﴾

තවද එය වටා යන අයටද (නමස්කාරයෙහි) සිටගන්නවුන්ටද නැමී සහ දණින් වැටී නමදින්නන්හටද මාගේ නිවස පවිත්‍රව තබාගන්න'.

وَاَذِّنْ فِى النَّاسِ بِالْحَجِّ يَاْتُوْكَ رِجَالًا وَّعَلٰى كُلِّ ضَامِرٍ يَّاْتِيْنَ مِنْ كُلِّ فَجٍّ عَمِيْقٍ ۙ﴿٢٨﴾

28. 'තවද හජ් වන්දනාව පිළිබඳව මනුෂ්‍යයින්ට නිවේදනය කරන්න. ඔවුන් ඔබ වෙත පා ගමනින් පැමිණෙන්නෝය. තවද සෑම දුර බැහැර ස්ථානවල සිට (වෙහෙසට පත්වූ) වැහැරුණු ඔටුවන් පිටද එන්නෝය'.

لِّيَشْهَدُوْا مَنَافِعَ لَهُمْ وَيَذْكُرُوا اسْمَ اللّٰهِ فِىْۤ اَيَّامٍ مَّعْلُوْمٰتٍ عَلٰى مَا رَزَقَهُمْ مِّنْۢ بَهِيْمَةِ الْاَنْعَامِ ۚ فَكُلُوْا مِنْهَا وَاَطْعِمُوا الْبَآئِسَ الْفَقِيْرَ ﴿٢٩﴾

29. එය ඔවුන් (එහි) ප්‍රයෝජනයන් තමන්ට දැක ගනු පිණිසද, ඔහු(අල්ලාහ්) ඔවුනට සපයා දී ඇති සිවුපා ගව සතුන් කෙරෙහි නියමිත දිනයන්හිදී අල්ලාහ්ගේ නාමය උසුරනු පිණිසද වේ. එබැවින් නුඹලා එයින් අනුභව කරනු. තවද දුකින් පෙළෙන අයටද අවශ්‍යතාවයෙන් පෙළෙන අයටද ආහාරය සඳහා දෙනු.

ثُمَّ لْيَقْضُوْا تَفَثَهُمْ وَلْيُوْفُوْا نُذُوْرَهُمْ وَلْيَطَّوَّفُوْا بِالْبَيْتِ الْعَتِيْقِ ﴿٣٠﴾

30. පසුව ඔවුන් තමන්ගේ පිරිසිදු කරගැනීමේ කාර්යයන් ඉටු කරත්වා. තවද තමන්ගේ භාරයන් ඉටුකරත්වා. තවද පුරාණ නිවස වටා ගමන් කරත්වා.

ذٰلِكَ ۗ وَمَنْ يُّعَظِّمْ حُرُمٰتِ اللّٰهِ فَهُوَ خَيْرٌ لَّهٗ عِنْدَ رَبِّهٖ ؕ وَاُحِلَّتْ لَـكُمُ الْاَنْعَامُ اِلَّا مَا يُتْلٰى عَلَيْكُمْ فَاجْتَنِبُوا الرِّجْسَ مِنَ الْاَوْثَانِ وَاجْتَنِبُوْا قَوْلَ الزُّوْرِ ۙ﴿٣١﴾

31. එය (අල්ලාහ්ගේ අණ) වේ. එමෙන්ම කවුරුන් හෝ අල්ලාහ්ගේ ශුද්ධ වූ දේවල්වලට ගරු කරන්නේද, එය ඔහුගේ අධිපතියාණන් වෙත ඔහුට යහපත වනු ඇත. තවද ගවසතුන් නුඹලාට නිත්‍යානුකූල (හලාල්) කරන ලදී. නමුත් නුඹලාට දැනුම් දී ඇති ඒවා හැරය. එමනිසා ප්‍රතිමා පිදීමේ පිළිකුල් (කාර්යයයෙන්) වැළකී සිටිනු. තවද බොරු කීමෙන්ද වැළකී සිටිනු.

حُنَفَآءَ لِلّٰهِ غَيْرَ مُشْرِكِيْنَ بِهٖ ؕ وَمَنْ يُّشْرِكْ بِاللّٰهِ فَكَاَنَّمَا خَرَّ مِنَ السَّمَآءِ

32. අල්ලාහ් වෙතටම නිරතුරුවම නැඹුරු වෙමින් ඔහුට කිසිවක් සමාන නොතබමින් (සිටිනු). තවද කවුරුන්

හෝ අල්ලාහ්ට සමාන තබන්නේද, ඔහු අහසින් වැටුනා සේය. තවද පක්ෂීන් ඔහුව ඩැහැගෙන යති. තවද සුළඟ ඔහුව දුර තැනකට උසුලාගෙන යයි.

فَتَخْطَفُهُ الطَّيْرُ أَوْ تَهْوِي بِهِ الرِّيحُ فِي مَكَانٍ سَحِيقٍ ﴿٣٢﴾

33. එය (එසේය). එමෙන්ම කවුරුන් හෝ අල්ලාහ්ගේ ශුද්ධ වූ සළකුණු වලට ගරු කරන්නේද, එය හදවත්හි බියබැතිමත්කමින් (එළි වන්නක්)ය.

ذَٰلِكَ وَمَن يُعَظِّمْ شَعَائِرَ اللَّهِ فَإِنَّهَا مِن تَقْوَى الْقُلُوبِ ﴿٣٣﴾

34. ඒවායෙහි (කැපවන්නා වූ ගවසතුන්හි) නුඹලාට නියමිත කලකට ප්‍රයෝජනයන් ඇත. පසුව ඒවා කැප කළ යුතු ස්ථානය පුරාණ නිවස වෙතය.

لَكُمْ فِيهَا مَنَافِعُ إِلَىٰ أَجَلٍ مُّسَمًّى ثُمَّ مَحِلُّهَا إِلَى الْبَيْتِ الْعَتِيقِ ﴿٣٤﴾

35. තවද අපි සියළු ජනතාවට කැප කිරීමේ පිළිවෙත් නියම කළෙමු. එය ඔහු ඔවුනට සපයා දී ඇති සිවුපා ගව සතුන් කෙරෙහි ඔවුන් අල්ලාහ්ගේ නාමය උසුරනු පිණිසය. එබැවින් නුඹලාගේ (නැමදීමට සුදුස්සා වන) දෙවියන් එකම දෙවියන්ය. එබැවින් නුඹලා (සියල්ලා) ඔහුට අවනත වනු. තවද නිහතමානී වන්නන්හට ශුභාරංචි දෙන්න.

وَلِكُلِّ أُمَّةٍ جَعَلْنَا مَنسَكًا لِّيَذْكُرُوا اسْمَ اللَّهِ عَلَىٰ مَا رَزَقَهُم مِّن بَهِيمَةِ الْأَنْعَامِ ۗ فَإِلَٰهُكُمْ إِلَٰهٌ وَاحِدٌ فَلَهُ أَسْلِمُوا ۗ وَبَشِّرِ الْمُخْبِتِينَ ﴿٣٥﴾

36. එවැන්නන් හට, අල්ලාහ්ව සිහිපත් කරනු ලබන විට ඔවුන්ගේ හදවත් ගරුසරුව බියට පත්වන්නේය. තවද ඔවුනට යමක් අත් වුවද ඉවසිලිවන්තයන්ය. තවද නමස්කාරයෙහි නිරත වන්නන්ය. තවද අප ඔවුනට සපයා දී ඇති දැයින් ඔවුන් වියදම් කරති.

الَّذِينَ إِذَا ذُكِرَ اللَّهُ وَجِلَتْ قُلُوبُهُمْ وَالصَّابِرِينَ عَلَىٰ مَا أَصَابَهُمْ وَالْمُقِيمِي الصَّلَاةِ وَمِمَّا رَزَقْنَاهُمْ يُنفِقُونَ ﴿٣٦﴾

37. තවද අල්ලාහ්ගේ ශුද්ධ වූ සළකුණු අතරින් අපි නුඹලාට කැප කිරීම සඳහා වූ ඔටුවන් නියම කර ඇත්තෙමු. උන් තුල නුඹලාට (ඉමහත්) යහපතක් ඇත. එබැවින් උන්ව පේළියට සිටුවා උන් මත අල්ලාහ්ගේ නාමය උසුරනු. තවද උන්ගේ පැති වලට උන් (මැරී) වැටුණු විට, එයින්

وَالْبُدْنَ جَعَلْنَاهَا لَكُم مِّن شَعَائِرِ اللَّهِ لَكُمْ فِيهَا خَيْرٌ ۖ فَاذْكُرُوا اسْمَ اللَّهِ عَلَيْهَا صَوَافَّ ۖ فَإِذَا وَجَبَتْ جُنُوبُهَا

فَكُلُوا مِنْهَا وَأَطْعِمُوا الْقَانِعَ وَالْمُعْتَرَّ ۚ كَذَٰلِكَ سَخَّرْنَاهَا لَكُمْ لَعَلَّكُمْ تَشْكُرُونَ ﴿٣٧﴾

අනුභව කරනු. තවද ලද දෙයින් සතුටු වන (එහෙත් අවශ්‍යතාවයෙන් පෙළෙන) අයටද බැගෑපත්ව ඉල්ලා සිටින අයටද අනුභවයට දෙනු. මෙලෙස නුඹලා කෘතඥවනු පිණිස අපි නුඹලාට උන්ව සේවය සඳහා යොදවා ඇත්තෙමු.

لَنْ يَنَالَ اللَّهَ لُحُومُهَا وَلَا دِمَاؤُهَا وَلَٰكِنْ يَنَالُهُ التَّقْوَىٰ مِنْكُمْ ۚ كَذَٰلِكَ سَخَّرَهَا لَكُمْ لِتُكَبِّرُوا اللَّهَ عَلَىٰ مَا هَدَاكُمْ ۗ وَبَشِّرِ الْمُحْسِنِينَ ﴿٣٨﴾

38. උන්ගේ මාංශ අල්ලාහ් වෙත ළං නොවනු ඇත. උන්ගේ රුධිරයද (ළං) නොවනු ඇත. නමුත් ඔහු වෙත ළං වනුයේ නුඹලාගේ බිය බැතිමත්කමය. මෙලෙස ඔහු නුඹලාට මග පෙන්වූ නිසා නුඹලා අල්ලාහ්ව කීර්තිමත් කරනු පිණිස ඔහු නුඹලාට සේවය සඳහා උන්ව යොදවා ඇත්තේය. තවද යහපත් ක්‍රියා කරන්නන් හට ශුභාරංචි දෙන්න.

إِنَّ اللَّهَ يُدَافِعُ عَنِ الَّذِينَ آمَنُوا ۗ إِنَّ اللَّهَ لَا يُحِبُّ كُلَّ خَوَّانٍ كَفُورٍ ﴿٣٩﴾

39. නියතවශයෙන්ම අල්ලාහ් විශ්වාසිත අයව ආරක්ෂා කරයි. නියතවශයෙන්ම අල්ලාහ් සියළු විශ්වාස ද්‍රෝහි අකෘතඥ අයව ප්‍රිය නොකරයි.

أُذِنَ لِلَّذِينَ يُقَاتَلُونَ بِأَنَّهُمْ ظُلِمُوا ۚ وَإِنَّ اللَّهَ عَلَىٰ نَصْرِهِمْ لَقَدِيرٌ ﴿٤٠﴾

40. යමෙකුට එරෙහිව යුද්ධ කරනු ලැබුවේද එවන් අයට (සටන් කිරීමට) අවසර දෙන ලදි. මන්දයත් ඔවුනට අසාධාරණ කරනු ලැබූ නිසාය. තවද ඇත්තෙන්ම අල්ලාහ් ඔවුනට උදව් කිරීමට බලය ඇත්තාය.

الَّذِينَ أُخْرِجُوا مِنْ دِيَارِهِمْ بِغَيْرِ حَقٍّ إِلَّا أَنْ يَقُولُوا رَبُّنَا اللَّهُ ۗ وَلَوْلَا دَفْعُ اللَّهِ النَّاسَ بَعْضَهُمْ بِبَعْضٍ لَهُدِّمَتْ صَوَامِعُ وَبِيَعٌ وَصَلَوَاتٌ وَمَسَاجِدُ يُذْكَرُ فِيهَا اسْمُ اللَّهِ كَثِيرًا ۗ وَلَيَنْصُرَنَّ

41. එවැන්නන් කවුරුන්ද යත්, ඔවුන් 'අපගේ අධිපතියාණන් අල්ලාහ්' යැයි කියූ නිසා පමණක් අසාධාරණ ලෙස තම නිවෙස් වලින් පලවාහරින ලද අය වෙති. තවද අල්ලාහ් මිනිසුන්ගෙන් සමහරෙකුව තවත් සමහරෙකු ලවා වළක්වා නොහැරියේ නම් ආශ්‍රමයන්ද ක්‍රිස්තියානි පල්ලියන්ද යුදෙව්වන්ගේ සිනගෝගයන්ද අල්ලාහ්ගේ නාමය බොහෝ සෙයින් සිහිකරනු ලබන මුස්ලිම් පල්ලියන්ද නියත වශයෙන්ම

اللّٰهُ مَنۡ يَّنۡصُرُهٗ ؕ اِنَّ اللّٰهَ لَقَوِىٌّ عَزِيۡزٌ ﴿٤١﴾

විනාශ කරනු ලබන්නට තිබුණි. එමෙන්ම අල්ලාහ්, ඔහුට උදව් වන අයට නියතවශයෙන්ම උදව් කරන්නේය. ඇත්තෙන්ම අල්ලාහ් ශක්තිවන්තය, බලසම්පන්නය.

اَلَّذِيۡنَ اِنۡ مَّكَّنّٰهُمۡ فِى الۡاَرۡضِ اَقَامُوا الصَّلٰوةَ وَاٰتَوُا الزَّكٰوةَ وَاَمَرُوۡا بِالۡمَعۡرُوۡفِ وَنَهَوۡا عَنِ الۡمُنۡكَرِ ؕ وَلِلّٰهِ عَاقِبَةُ الۡاُمُوۡرِ ﴿٤٢﴾

42. එවන් අයව අප පොළොවෙහි ස්ථාපිත කළහොත්, ඔවුන් නැමදුමෙහි නිරත වන්නෝය. තවද zසකාත් (දුගී බද්ද) ගෙවන්නෝය. තවද යහපත අණ කරන්නෝය. තවද නපුර වළක්වන්නෝය. තවද සියළු කටයුත්තෙහි අවසානය අල්ලාහ් වෙතය.

وَاِنۡ يُّكَذِّبُوۡكَ فَقَدۡ كَذَّبَتۡ قَبۡلَهُمۡ قَوۡمُ نُوۡحٍ وَّعَادٌ وَّثَمُوۡدُ ۙ ﴿٤٣﴾

43. තවද ඔවුන් ඔබව මුසාවාදියෙකු යැයි චෝදනා කරන්නේ නම්, ඔවුන්ට පෙර නූහ්ගේ ජනතාවද ආද් හා සමූද්(ගෝත්‍රිකයින්)ද (ඔවුන්ගේ දූතයන්ව) මුසාවාදි යැයි චෝදනා නැගුහ.

وَقَوۡمُ اِبۡرٰهِيۡمَ وَقَوۡمُ لُوۡطٍ ۙ ﴿٤٤﴾

44. තවද ඉබ්රාහීම්ගේ ජනතාවද ලූත්ගේ ජනතාවද (එසේ කළහ).

وَّاَصۡحٰبُ مَدۡيَنَ ۚ وَكُذِّبَ مُوۡسٰى فَاَمۡلَيۡتُ لِلۡكٰفِرِيۡنَ ثُمَّ اَخَذۡتُهُمۡ ۚ فَكَيۡفَ كَانَ نَكِيۡرِ ﴿٤٥﴾

45. තවද මද්යන්හි වැසියන්ද (එසේ කළහ). එමෙන්ම මූසාද මුසාවාදි යැයි චෝදනා කරනු ලැබුවේය. නමුත් මම අවිශ්වාසිතයින්ට කාල අවකාශය දුන්නෙමි. පසුව මම ඔවුන්ව හසු කර ගත්තෙමි. තවද මාගේ දඬුවම කෙතරම් බිහිසුණු විද!

فَكَاَيِّنۡ مِّنۡ قَرۡيَةٍ اَهۡلَكۡنٰهَا وَهِىَ ظَالِمَةٌ فَهِىَ خَاوِيَةٌ عَلٰى عُرُوۡشِهَا وَبِئۡرٍ مُّعَطَّلَةٍ وَّقَصۡرٍ مَّشِيۡدٍ ﴿٤٦﴾

46. අපි කෙතරම් නගරයන්, ඒවා වැරදි කරමින් සිටියදී විනාශ කර ඇත්තෙමුද? ඒවා ඒවායේ වහල් මත ඇද වැටුණි. එමෙන්ම පාළු වූ ළිං සහ සුවිසල් බලකොටු (කෙතරම්)ද!

اَفَلَمۡ يَسِيۡرُوۡا فِى الۡاَرۡضِ فَتَكُوۡنَ لَهُمۡ قُلُوۡبٌ يَّعۡقِلُوۡنَ بِهَاۤ اَوۡ اٰذَانٌ يَّسۡمَعُوۡنَ

47. එහෙයින් ඔවුන් භූමියෙහි සංචාරය නොකළේද? මෙමගින් ඔවුනට වටහාගැනීමට හදවත් හෝ මෙමගින් ඔවුනට ඇසිය හැකි කන්

بِهَا ۚ فَإِنَّهَا لَا تَعْمَى الْأَبْصَارُ وَلَٰكِنْ تَعْمَى الْقُلُوبُ الَّتِي فِي الصُّدُورِ ﴿٤٧﴾

හෝ ලැබීමට තිබුණි. (ඇත්තෙන්ම) බාහිර ඇස් අන්ධ නැත. එහෙත් ඔවුන්ගේ ළය තුල ඇති හදවත් අන්ධය.

وَيَسْتَعْجِلُونَكَ بِالْعَذَابِ وَلَنْ يُخْلِفَ اللَّهُ وَعْدَهُ ۚ وَإِنَّ يَوْمًا عِنْدَ رَبِّكَ كَأَلْفِ سَنَةٍ مِمَّا تَعُدُّونَ ﴿٤٨﴾

48. තවද ඔවුන් ඔබගෙන් දඬුවම කඩිනම් වීමට ඉල්ලා සිටිති. නමුත් අල්ලාහ් කිසිවිටෙකත් තම පොරොන්දුව කඩ නොකරන්නේය. තවද ඇත්තෙන්ම ඔබගේ අධිපතියාණන් වෙත, එක් දවසක්, නුඹලාගේ ගණන් ගැනීම පරිදි වසර දහසක්ය.

وَكَأَيِّنْ مِنْ قَرْيَةٍ أَمْلَيْتُ لَهَا وَهِيَ ظَالِمَةٌ ثُمَّ أَخَذْتُهَا ۚ وَإِلَيَّ الْمَصِيرُ ﴿٤٩﴾

49. එමෙන්ම මම කෙතරම් නගරයන්ට ඒවා වැරදිකරමින් සිටියදී කාල අවකාශය දුන්නෙමිද? පසුව මම ඒවා හසුකරගත්තෙමි. තවද ආපසු පැමිණීම මා වෙතමය.

قُلْ يَا أَيُّهَا النَّاسُ إِنَّمَا أَنَا لَكُمْ نَذِيرٌ مُبِينٌ ﴿٥٠﴾

50. 'එම්බල ජනතාවනි! මම නුඹලාට ප්‍රත්‍යක්ෂ අවවාදකරුවෙක් පමණක් යැ'යි පවසන්න.

فَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَهُمْ مَغْفِرَةٌ وَرِزْقٌ كَرِيمٌ ﴿٥١﴾

51. විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අය ගත්කල ඔවුනට ක්ෂමාවද ගෞරවනීය ජීවනෝපායක්ද ඇත.

وَالَّذِينَ سَعَوْا فِي آيَاتِنَا مُعَاجِزِينَ أُولَٰئِكَ أَصْحَابُ الْجَحِيمِ ﴿٥٢﴾

52. නමුත් (අපගේ අරමුණු) නිෂ්ඵල කිරීමට පතමින් අපගේ සළකුණු වලට එරෙහිව තැත්කරන අය ගත්කල මොවුහුම නිරා ගින්නේ සහකරුවන්ය.

وَمَا أَرْسَلْنَا مِنْ قَبْلِكَ مِنْ رَسُولٍ وَلَا نَبِيٍّ إِلَّا إِذَا تَمَنَّىٰ أَلْقَى الشَّيْطَانُ فِي أُمْنِيَّتِهِ فَيَنْسَخُ اللَّهُ مَا يُلْقِي الشَّيْطَانُ ثُمَّ يُحْكِمُ اللَّهُ آيَاتِهِ ۗ وَاللَّهُ عَلِيمٌ حَكِيمٌ ﴿٥٣﴾

53. තවද ඔබට පෙර අප එවූ දූතයෙකු හෝ වක්තෘවරයෙකු හෝ ඔහු යමක් අභිලාෂය කළ සෑමවිටම ඔහු අභිලාෂය කළ මාර්ගයෙහි ෂෙයිතාන් බාධකයන් ඇතිකරමින් සිටියේය. නමුත් ෂෙයිතාන් විසින් ඇති කරන දේ අල්ලාහ් ඉවත් කරන්නේය. පසුව අල්ලාහ් ඔහුගේ සළකුණු ස්ථිර ලෙස ස්ථාපිත කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

54. (වක්තෘවරුන්ගේ මාර්ගයෙහි) ෂෙයිතාන් ඇති කරන දේ (බාධකයන්) හදවත් තුළ රෝගය ඇති අයටද හදවත් දැඩි වූ අයටද පිරික්සුමක් වනු පිණිස ඔහු ඉඩ හරින්නේය. තවද නියතවශයෙන්ම වරදකරුවන් (දුර්මාර්ගයෙහි) ඈත්ව ගොස්ය.

لِّيَجْعَلَ مَا يُلْقِى الشَّيْطٰنُ فِتْنَةً لِّلَّذِيْنَ فِىْ قُلُوْبِهِمْ مَّرَضٌ وَّالْقَاسِيَةِ قُلُوْبُهُمْ ؕ وَاِنَّ الظّٰلِمِيْنَ لَفِىْ شِقَاقٍۢ بَعِيْدٍ ۙ﴿٥٤﴾

55. තවද එය ඔබ අධිපතියාණන්ගෙන් වන සත්‍යය බව දැනුම දෙනු ලැබූ අය වටහාගෙන පසුව ඔවුන් එය කෙරෙහි විශ්වාස කොට ඔවුන්ගේ හදවත් ඔහු වෙතට යටත් වනු පිණිසද වේ. තවද විශ්වාස කරන්නන්ව නියතවශයෙන්ම අල්ලාහ් ඍජු මාර්ගයට යොමු කරන්නේය.

وَّلِيَعْلَمَ الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ اَنَّهُ الْحَقُّ مِنْ رَّبِّكَ فَيُؤْمِنُوْا بِهٖ فَتُخْبِتَ لَهٗ قُلُوْبُهُمْ ؕ وَاِنَّ اللّٰهَ لَهَادِ الَّذِيْنَ اٰمَنُوْۤا اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٥٥﴾

56. තවද අවිශ්වාස කරන අය, තමන් කෙරෙහි එම හෝරාව සැනකින්ම පැමිණෙන තුරුද නැතහොත් විනාශකාරී දිනයක දඬුවම තමන් වෙතට පැමිණෙන තුරුද එය පිළිබඳව සැකයෙහිම වන්නෝය.

وَلَا يَزَالُ الَّذِيْنَ كَفَرُوْا فِىْ مِرْيَةٍ مِّنْهُ حَتّٰى تَاْتِيَهُمُ السَّاعَةُ بَغْتَةً اَوْ يَاْتِيَهُمْ عَذَابُ يَوْمٍ عَقِيْمٍ ﴿٥٦﴾

57. එදින රාජ්‍යය අල්ලාහ්ගේ වනු ඇත. ඔහු ඔවුනතර විනිශ්චය කරන්නේය. එබැවින් විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අය දිව්‍ය සැපතින් යුක්තවූ උද්‍යානයන්හි වන්නෝය.

اَلْمُلْكُ يَوْمَئِذٍ لِّلّٰهِ ؕ يَحْكُمُ بَيْنَهُمْ ؕ فَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ فِىْ جَنّٰتِ النَّعِيْمِ ﴿٥٧﴾

58. නමුත් අවිශ්වාස කර අපගේ සළකුණු ප්‍රතික්ෂේප කරන අයට නින්දා සහගත දඬුවමක් ලැබෙනු ඇත.

وَالَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَا فَاُولٰٓئِكَ لَهُمْ عَذَابٌ مُّهِيْنٌ ﴿٥٨﴾

59. තවද අල්ලාහ්ගේ මාර්ගයෙහි තම නිවෙස් හැර ගොස් පසුව ඝාතනය කරනු ලැබ හෝ මරණයට පත්වන අයට නියතවශයෙන්ම

وَالَّذِيْنَ هَاجَرُوْا فِىْ سَبِيْلِ اللّٰهِ ثُمَّ قُتِلُوْۤا اَوْ مَاتُوْا لَيَرْزُقَنَّهُمُ اللّٰهُ رِزْقًا حَسَنًا ؕ

وَإِنَّ اللَّهَ لَهُوَ خَيْرُ الرَّازِقِينَ ٥٩

අල්ලාහ් යහපත් ජීවනෝපාය සපයන්නේය. තවද නියතවශයෙන්ම අල්ලාහ් ජීවනෝපාය සපයන්නන්ගෙන් ශ්‍රේෂ්ඨය.

لَيُدْخِلَنَّهُم مُّدْخَلًا يَرْضَوْنَهُ ۗ وَإِنَّ اللَّهَ لَعَلِيمٌ حَلِيمٌ ٦٠

60. ඔවුන් තෘප්තිමත්වන්නාවූ ස්ථානයකට ඔවුන්ව නියතවශයෙන්ම ඔහු යොමු කරන්නේය. තවද ඇත්තෙන්ම අල්ලාහ් සියල්ල දන්නාය, ඉවසිලිවන්තය.

ذَٰلِكَ ۖ وَمَنْ عَاقَبَ بِمِثْلِ مَا عُوقِبَ بِهِ ثُمَّ بُغِيَ عَلَيْهِ لَيَنصُرَنَّهُ اللَّهُ ۗ إِنَّ اللَّهَ لَعَفُوٌّ غَفُورٌ ٦١

61. එය මෙසේය. තවද යමෙකු ඔහු ලක්වූ පීඩාවට සමානව පීඩා කරන්නේද පසුව ඔහු අපරාධයට ලක් කරනු ලැබුවේද අල්ලාහ් නියතවශයෙන්ම ඔහුට උදව් කරන්නේය. ඇත්තෙන්ම අල්ලාහ් පව් මකාදමන්නාය, ක්ෂමාන්විතය.

ذَٰلِكَ بِأَنَّ اللَّهَ يُولِجُ اللَّيْلَ فِي النَّهَارِ وَيُولِجُ النَّهَارَ فِي اللَّيْلِ وَأَنَّ اللَّهَ سَمِيعٌ بَصِيرٌ ٦٢

62. එය මන්ද යත් අල්ලාහ් රැය දවාලයෙහි ඇතුළු කරන්නේය. තවද දහවල රැයෙහි ඇතුළු කරන්නේය. අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

ذَٰلِكَ بِأَنَّ اللَّهَ هُوَ الْحَقُّ وَأَنَّ مَا يَدْعُونَ مِن دُونِهِ هُوَ الْبَاطِلُ وَأَنَّ اللَّهَ هُوَ الْعَلِيُّ الْكَبِيرُ ٦٣

63. එය මන්ද යත්, අල්ලාහ් සත්‍යවන්ත මෙන්ම ඔහු හැර ඔවුන් අයදින දේ අසත්‍ය හෙයිනි. තවද අල්ලාහ් අති උසස් සහ අති ශ්‍රේෂ්ඨ වන හෙයිනි.

أَلَمْ تَرَ أَنَّ اللَّهَ أَنزَلَ مِنَ السَّمَاءِ مَاءً فَتُصْبِحُ الْأَرْضُ مُخْضَرَّةً ۗ إِنَّ اللَّهَ لَطِيفٌ خَبِيرٌ ٦٤

64. අල්ලාහ් අහසින් ජලය පහළ කර පොළොව හරිත වන සැටි ඔබ දැක නොතිබේද? අල්ලාහ් ඇත්තෙන්ම සූක්ෂම ඥානය ඇත්තාය, සියල්ලෙහිම විමසිලිවන්තය.

لَهُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۗ وَإِنَّ اللَّهَ لَهُوَ الْغَنِيُّ الْحَمِيدُ ٦٥ ع

65. අහසෙහි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද ඔහුටම අයත්ය. තවද නියතවශයෙන්ම අල්ලාහ් ස්වයං පෝෂිතය, ප්‍රසංශාහිමිය.

*66. අල්ලාහ් පොළොවෙහි ඇති සියළු දේ නුඹලාට සේවය සඳහා යොදවා ඇති සැටිත් ඔහුගේ විධානයෙන් මුහුදෙහි නැව් යාත්‍රා කරන සැටිත් ඔබ දැක නොතිබේද? තවද ඔහුගේ අවසරයෙන් තොරව ආකාශ වස්තූන් පොළොවට පතිත වීමෙන් ඔහු වළක්වන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් මිනිසුන් කෙරෙහි සානුකම්පිතය, (තවද) පරම දයාබරය.

أَلَمْ تَرَ أَنَّ اللَّهَ سَخَّرَ لَكُمْ مَا فِي الْأَرْضِ وَالْفُلْكَ تَجْرِي فِي الْبَحْرِ بِأَمْرِهِ ۖ وَيُمْسِكُ السَّمَاءَ أَنْ تَقَعَ عَلَى الْأَرْضِ إِلَّا بِإِذْنِهِ ۗ إِنَّ اللَّهَ بِالنَّاسِ لَرَءُوفٌ رَحِيمٌ ٦٦

67. තවද නුඹලාට ජීවය දුන්නේ ඔහුමය. පසුව ඔහු නුඹලාව මරණයට පත්කරන්නේය. පසුව ඔහු (නැවතත්) නුඹලාට ජීවය දෙන්නේය. නියතවශයෙන්ම මිනිසා ඉතාමත් අකෘතඥය.

وَهُوَ الَّذِي أَحْيَاكُمْ ثُمَّ يُمِيتُكُمْ ثُمَّ يُحْيِيكُمْ ۗ إِنَّ الْإِنْسَانَ لَكَفُورٌ ٦٧

68. සියළු ජනතාවන්ට ඔවුන් පිළිපදින්නාවූ නැමදුම්හි පිළිවෙත් අපි නියම කර ඇත්තෙමු. එමනිසා ඔවුන් ඔබ සමග එම කටයුත්ත සම්බන්ධව වාද නොකරත්වා. තවද ඔබ ඔබගේ අධිපතියාණන් වෙත අයදින්න. නියතවශයෙන්ම ඔබ සෘජු මාර්ගයෙහිමය.

لِكُلِّ أُمَّةٍ جَعَلْنَا مَنْسَكًا هُمْ نَاسِكُوهُ ۖ فَلَا يُنَازِعُنَّكَ فِي الْأَمْرِ ۚ وَادْعُ إِلَىٰ رَبِّكَ ۖ إِنَّكَ لَعَلَىٰ هُدًى مُسْتَقِيمٍ ٦٨

69. තවද ඔවුන් ඔබ සමග තර්ක කරන්නේ නම්, 'නුඹලා කරන දේ අල්ලාහ් මැනැවින් දන්නේයැ'යි පවසන්න.

وَإِنْ جَادَلُوكَ فَقُلِ اللَّهُ أَعْلَمُ بِمَا تَعْمَلُونَ ٦٩

70. 'නුඹලා එකඟ නොවූ දේ සම්බන්ධව, පුනරුත්ථාන දිනයේදී අල්ලාහ් නුඹලා අතර විනිශ්චය කරන්නේය'.

اللَّهُ يَحْكُمُ بَيْنَكُمْ يَوْمَ الْقِيَامَةِ فِيمَا كُنْتُمْ فِيهِ تَخْتَلِفُونَ ٧٠

71. අහස් සහ පොළොවෙහි ඇති සියල්ල අල්ලාහ් දන්නේ යැයි ඔබ නොදන්නෙහිද? නියතවශයෙන්ම එය (සියල්ලම) ග්‍රන්ථයෙහි (සුරක්ෂිතව) ඇත. (තවද) එය අල්ලාහ්ට ඉතා පහසුය.

أَلَمْ تَعْلَمْ أَنَّ اللَّهَ يَعْلَمُ مَا فِي السَّمَاءِ وَالْأَرْضِ ۗ إِنَّ ذَٰلِكَ فِي كِتَابٍ ۚ إِنَّ ذَٰلِكَ عَلَى اللَّهِ يَسِيرٌ ٧١

*සටහන: 66. මෙහි එන 'අවසරය' යන වචනය උල්කාපාත පතිත වීම සහ අනිකුත් ආකාශ වස්තූන් පොළොවට ඇද හෙළීම සම්බන්ධයෙන් විය හැක.

وَيَعْبُدُونَ مِنْ دُونِ اللَّهِ مَا لَمْ يُنَزِّلْ بِهِ سُلْطَانًا وَمَا لَيْسَ لَهُمْ بِهِ عِلْمٌ ۗ وَمَا لِلظَّالِمِينَ مِنْ نَصِيرٍ ﴿٧٢﴾

72. තවද ඔවුහු අල්ලාහ් හැර, ඔහු කිසිදු සාධකයක් පහළ නොකළාවූ දෙයට නැමදුම් කරති. තවද ඔවුනට ඒ ගැන කිසිම දැනුමක්ද නැත. තවද වැරදි කරන අයට කිසිදු උදව්කරුවෙකු නැත.

وَإِذَا تُتْلَىٰ عَلَيْهِمْ آيَاتُنَا بَيِّنَاتٍ تَعْرِفُ فِي وُجُوهِ الَّذِينَ كَفَرُوا الْمُنْكَرَ ۖ يَكَادُونَ يَسْطُونَ بِالَّذِينَ يَتْلُونَ عَلَيْهِمْ آيَاتِنَا ۗ قُلْ أَفَأُنَبِّئُكُمْ بِشَرٍّ مِنْ ذَٰلِكُمُ ۗ النَّارُ وَعَدَهَا اللَّهُ الَّذِينَ كَفَرُوا ۖ وَبِئْسَ الْمَصِيرُ ﴿٧٣﴾

73. තවද අපගේ පැහැදිලි වදන් ඔවුන් වෙත පාරායනා කරනු ලබන විට, අවිශ්වාස කරන අයගේ මුහුණු වල ප්‍රතික්ෂේපය ඔබ දැනගන්නෙහිය. අපගේ වදන් ඔවුනට පාරායනා කරන අයට ඔවුහු පහර දීමට එළඹෙති. 'ඊටත් වඩා නරක දෙයක් ගැන මා නුඹලාට කියා දෙන්නද? (එය) ගින්නය! අවිශ්වාස කරන අයට අල්ලාහ් එය පොරොන්දු වී ඇත. තවද එය අධම වාසස්ථානයක්යැ!'යි පවසන්න.

يَا أَيُّهَا النَّاسُ ضُرِبَ مَثَلٌ فَاسْتَمِعُوا لَهُ ۚ إِنَّ الَّذِينَ تَدْعُونَ مِنْ دُونِ اللَّهِ لَنْ يَخْلُقُوا ذُبَابًا وَلَوِ اجْتَمَعُوا لَهُ ۖ وَإِنْ يَسْلُبْهُمُ الذُّبَابُ شَيْئًا لَا يَسْتَنْقِذُوهُ مِنْهُ ۚ ضَعُفَ الطَّالِبُ وَالْمَطْلُوبُ ﴿٧٤﴾

74. එම්බල මිනිසුනි! උපමාවක් ගෙන හැර දක්වන ලදි. එබැවින් එයට සවන් දෙනු. නියතවශයෙන්ම නුඹලා අල්ලාහ් හැර කිසිවෙකුට අයැදින්නේද ඒ අයට මැස්සෙකුවත් මැවිය නොහැක. ඒ සඳහා ඔවුන් සියල්ල එක් වුවද (එය කළ නොහැක). තවද මැස්සෙකු ඔවුන්ගෙන් යම් දෙයක් පැහැරගෙන ගියවිට එයින් ආපසු ලබාගැනීමටවත් ඔවුනට නොහැක. යදින්නා සහ යදිනු ලබන්නාද (යන දෙදෙනාම) ඇත්තෙන්ම දුර්වලය.

مَا قَدَرُوا اللَّهَ حَقَّ قَدْرِهِ ۗ إِنَّ اللَّهَ لَقَوِيٌّ عَزِيزٌ ﴿٧٥﴾

75. ඔවුහු අල්ලාහ්ට අගය කළ යුතු පරිදි ඔහුට අගය නොකළහ. නියතවශයෙන්ම අල්ලාහ් ශක්තිසම්පන්නය, බල සම්පන්නය.

اللَّهُ يَصْطَفِي مِنَ الْمَلَائِكَةِ رُسُلًا وَمِنَ النَّاسِ ۚ إِنَّ اللَّهَ سَمِيعٌ بَصِيرٌ ﴿٧٦﴾

76. අල්ලාහ් සුරදූතයින් අතුරින්ද මිනිසුන් අතුරින්ද දූතයින්ව තෝරාගන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

يَعْلَمُ مَا بَيْنَ أَيْدِيهِمْ وَمَا خَلْفَهُمْ ۗ وَإِلَى اللَّهِ تُرْجَعُ الْأُمُورُ ﴿٧٧﴾

77. ඔවුනට ඉදිරියෙන් ඇති දේද ඔවුනට පිටුපසින් ඇති දේද ඔහු දන්නේය. තවද අල්ලාහ් වෙතටම (සියළු) කාර්‍යයන් නැවත පමුණුවනු ලබන්නේය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا ارْكَعُوا وَاسْجُدُوا وَاعْبُدُوا رَبَّكُمْ وَافْعَلُوا الْخَيْرَ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿٧٨﴾ ۩

78. එම්බල විශ්වාසිතයිනි! නමස්කාරයෙහි හිස පහළට නමනු. නමස්කාරයෙහි නළල බිම තබනු. තවද නුඹලාගේ අධිපතියාණන්ට නමදිනු. තවද නුඹලා සෞභාග්‍යමත් වනු පිණිස යහපත් ක්‍රියාවන් කරනු.

وَجَاهِدُوا فِي اللَّهِ حَقَّ جِهَادِهِ ۚ هُوَ اجْتَبَاكُمْ وَمَا جَعَلَ عَلَيْكُمْ فِي الدِّينِ مِنْ حَرَجٍ ۚ مِلَّةَ أَبِيكُمْ إِبْرَاهِيمَ ۚ هُوَ سَمَّاكُمُ الْمُسْلِمِينَ مِنْ قَبْلُ وَفِي هَٰذَا لِيَكُونَ الرَّسُولُ شَهِيدًا عَلَيْكُمْ وَتَكُونُوا شُهَدَاءَ عَلَى النَّاسِ ۚ فَأَقِيمُوا الصَّلَاةَ وَآتُوا الزَّكَاةَ وَاعْتَصِمُوا بِاللَّهِ هُوَ مَوْلَاكُمْ ۖ فَنِعْمَ الْمَوْلَىٰ وَنِعْمَ النَّصِيرُ ﴿٧٩﴾

79. තවද අල්ලාහ්ගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදිය යුතු ආකාරයට පරිශ්‍රමයෙහි යෙදෙනු. ඔහු නුඹලාව තෝරාගෙන ඇත. තවද ආගමෙහි නුඹලා කෙරෙහි කිසිදු දුෂ්කරතාවයක් පටවා නොමැත. (එමනිසා) නුඹලාගේ පියාණන් වන ඉබ්රාහිම්ගේ ධර්මය (පිළිපදිනු). එබැවින් දූතයාණන් නුඹලා කෙරෙහි සාක්ෂි වනු පිණිසද නුඹලා මනුෂ්‍යයන් කෙරෙහි සාක්ෂි වනු පිණිසද පෙර මෙන්ම මෙ(ම ග්‍රන්ථයෙ)හිද ඔහු නුඹලාට මුස්ලිම්වරු යැයි නම් කළේය. එමනිසා නැමදුමෙහි නිරත වනු, තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු, තවද අල්ලාහ්ව දැඩිව ග්‍රහණය කරගනු. ඔහු නුඹලාගේ අධිපතිය, විශිෂ්ඨ අධිපතියාය (සහ) විශිෂ්ඨ උදව්කරුවාය!




## අල් මුඃමිනූන්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

18-කොටස

قَدۡ أَفۡلَحَ ٱلۡمُؤۡمِنُونَ ﴿٢﴾

2. නියතවශයෙන්ම විශ්වාසිතයින් ජයග්‍රහණය ලැබූහ.

ٱلَّذِينَ هُمۡ فِي صَلَاتِهِمۡ خَٰشِعُونَ ﴿٣﴾

3. ඔවුන් සිය නැමදුමෙහි නිහතමානි වන්නන්ය.

وَٱلَّذِينَ هُمۡ عَنِ ٱللَّغۡوِ مُعۡرِضُونَ ﴿٤﴾

4. තවද ඔවුන් අනවශ්‍යය දේ සියල්ලෙන් වැළකී සිටින්නන්ය.

وَٱلَّذِينَ هُمۡ لِلزَّكَوٰةِ فَٰعِلُونَ ﴿٥﴾

5. තවද ඔවුන් zසකාත් (දුගී බද්ද) ගෙවීමෙහි යුහුසුළු වන්නන්ය.

وَٱلَّذِينَ هُمۡ لِفُرُوجِهِمۡ حَٰفِظُونَ ﴿٦﴾

6. තවද ඔවුන් තමන්ගේ පතිවත් රකින්නන්ය.

إِلَّا عَلَىٰٓ أَزۡوَٰجِهِمۡ أَوۡ مَا مَلَكَتۡ أَيۡمَٰنُهُمۡ فَإِنَّهُمۡ غَيۡرُ مَلُومِينَ ﴿٧﴾

7. ඔවුන්ගේ බිරිඳන් හෝ ඔවුන්ගේ දකුණත් හිමි කරගත් අය හැරෙන්නටය. එබැවින් නියතවශයෙන්ම ඔවුන් දොස් පවරනු නොලබන්නන්ය.

فَمَنِ ٱبۡتَغَىٰ وَرَآءَ ذَٰلِكَ فَأُوْلَٰٓئِكَ هُمُ ٱلۡعَادُونَ ﴿٨﴾

8. නමුත් යමෙක් මින් ඔබ්බට (යම් දෙයක්) පතන්නේ නම්, ඔවුන්ම සීමාව ඉක්මවන්නන්ය.

وَٱلَّذِينَ هُمۡ لِأَمَٰنَٰتِهِمۡ وَعَهۡدِهِمۡ رَٰعُونَ ﴿٩﴾

9. තවද ඔවුන් තමන්ට විශ්වාස පිට පැවරූ දේවල් සහ තමන්ගේ ගිවිසුම් ගැන පරික්ෂාකාරී වන්නන්ය.

وَٱلَّذِينَ هُمۡ عَلَىٰ صَلَوَٰتِهِمۡ يُحَافِظُونَ ﴿١٠﴾

10. තවද ඔවුන් තමන්ගේ නැමදුම් උද්‍යෝගිමත්ව රකින්නන්ය.

أُوْلَٰٓئِكَ هُمُ ٱلۡوَٰرِثُونَ ﴿١١﴾

11. මොවුහුම උරුමක්කාරයන්ය.

ٱلَّذِينَ يَرِثُونَ ٱلۡفِرۡدَوۡسَ هُمۡ فِيهَا

12. ඔවුන් ෆිර්දවුස් (නම් ස්වර්ගය)ට උරුමකම් ලබන්නන්ය. ඔවුහු එහිම

خٰلِدُوْنَ ﴿١٢﴾

සදාකල් වාසය කරන්නන්ය.

وَلَقَدْ خَلَقْنَا الْاِنْسَانَ مِنْ سُلٰلَةٍ مِّنْ طِيْنٍ ﴿١٣﴾

13. ඇත්තෙන්ම අපි මිනිසාව මැටි සාරයෙන් මවා ඇත්තෙමු.

ثُمَّ جَعَلْنٰهُ نُطْفَةً فِيْ قَرَارٍ مَّكِيْنٍ ﴿١٤﴾

14. පසුව අපි ඔහුව සුරක්ෂිත තැන්පත් ස්ථානයක ශුක්‍රාණු බිඳුවක් ලෙස තැබුවෙමු.

ثُمَّ خَلَقْنَا النُّطْفَةَ عَلَقَةً فَخَلَقْنَا الْعَلَقَةَ مُضْغَةً فَخَلَقْنَا الْمُضْغَةَ عِظٰمًا فَكَسَوْنَا الْعِظٰمَ لَحْمًا ثُمَّ اَنْشَاْنٰهُ خَلْقًا اٰخَرَ فَتَبٰرَكَ اللّٰهُ اَحْسَنُ الْخٰلِقِيْنَ ﴿١٥﴾

15. පසුව අපි ශුක්‍රාණු බිඳුව ලේ කැටියක් බවට පත් කළෙමු. පසුව අපි එම ලේ කැටිය, (හැඩයක් නොමැති) මාංශ පිඩුවක් බවට පත් කළෙමු. පසුව අපි මෙම (හැඩයක් නොමැති) මාංශ පිඩුව අස්ථි බවට පත් කළෙමු. පසුව අපි මෙම අස්ථීන් මසින් ආවරණය කළෙමු. පසුව අපි එය තවත් මැවීමක් බවට වර්ධනය කළෙමු. එබැවින් අල්ලාහ් අතිශයින්ම ආශිර්වාද කරන්නාය. අති ශ්‍රේෂ්ඨ මැවුම්කරුවාය.

ثُمَّ اِنَّكُمْ بَعْدَ ذٰلِكَ لَمَيِّتُوْنَ ﴿١٦﴾

16. පසුව නුඹලා එයට පසු නියතවශයෙන්ම මරණයට පත් වන්නන්ය.

ثُمَّ اِنَّكُمْ يَوْمَ الْقِيٰمَةِ تُبْعَثُوْنَ ﴿١٧﴾

17. පසුව පුනරුත්ථාන දිනයේදී නියතවශයෙන්ම නුඹලා නැගිටුවනු ලබන්නෙහුය.

وَلَقَدْ خَلَقْنَا فَوْقَكُمْ سَبْعَ طَرَآئِقَ وَمَا كُنَّا عَنِ الْخَلْقِ غٰفِلِيْنَ ﴿١٨﴾

18. තවද අපි නුඹලාට ඉහලින් මාර්ගයන් හතක් මවා ඇත්තෙමු. තවද අපි කිසිවිටෙකත් මැවීමෙහි නොසැලකිලිමත් නොවීමු.

وَاَنْزَلْنَا مِنَ السَّمَآءِ مَآءً بِقَدَرٍ فَاَسْكَنّٰهُ فِي الْاَرْضِ وَاِنَّا عَلٰى ذَهَابٍ بِهٖ لَقٰدِرُوْنَ ﴿١٩﴾

19. තවද අපි අහසින් නියමිත ප්‍රමාණයකට ජලය පහළ කළෙමු. තවද අපි එය පොළොවෙහි රැඳීමට සැලැස්වීමු. තවද නියතවශයෙන්ම අපිම එය නැති කිරීමට බලය ඇත්තන් වෙමු.

فَاَنْشَاْنَا لَكُمْ بِهٖ جَنّٰتٍ مِّنْ نَّخِيْلٍ

20. පසුව අපි එමගින් නුඹලා

وَّاَعۡنَابٍ‌ ۘ لَـكُمۡ فِيۡهَا فَوَاكِهُ كَثِيۡرَةٌ وَّمِنۡهَا تَاۡكُلُوۡنَ ۙ‏ ﴿۱۹﴾

වෙනුවෙන් රටඉඳි සහ මිදි වතු ඇතිකළෙමු. ඒවායෙහි නුඹලාට බොහෝ පළතුරු ඇත. තවද නුඹලා එයින් අනුභව කරන්නෙහුය.

وَشَجَرَةً تَخۡرُجُ مِنۡ طُوۡرِ سَيۡنَآءَ تَنۡۢبُتُ بِالدُّهۡنِ وَصِبۡغٍ لِّلۡاٰكِلِيۡنَ‏ ﴿۲۰﴾

21. තවද සිනායි කන්දෙන් හටගන්නා ගසක් ඇත. එය අනුභව කරන්නන් සඳහා තෙල් සහ සුප වර්ග නිපදවයි.

وَاِنَّ لَـكُمۡ فِى الۡاَنۡعَامِ لَعِبۡرَةً‌ ؕ نُسۡقِيۡكُمۡ مِّمَّا فِىۡ بُطُوۡنِهَا وَلَـكُمۡ فِيۡهَا مَنَافِعُ كَثِيۡرَةٌ وَّمِنۡهَا تَاۡكُلُوۡنَ ۙ‏ ﴿۲۱﴾

22. තවද ගවසතුන්ගෙන්(ද) නුඹලාට පාඩමක් ඇත. අපි උන්ගේ කුස් තුළ ඇති දෙයින් නුඹලාට පානය කිරීමට දෙන්නෙමු. තවද බොහෝ ප්‍රයෝජන නුඹලාට උන්ගෙන් ඇත. තවද නුඹලා එයින් අනුභව කරන්නෙහුය.

وَعَلَيۡهَا وَعَلَى الۡـفُلۡكِ تُحۡمَلُوۡنَ‏ ﴿۲۲﴾

23. තවද උන් මතද නැව් මතද නුඹලා උසුලනු ලබන්නෙහුය.

وَلَـقَدۡ اَرۡسَلۡنَا نُوۡحًا اِلٰى قَوۡمِهٖ فَقَالَ يٰقَوۡمِ اعۡبُدُوا اللّٰهَ مَا لَـكُمۡ مِّنۡ اِلٰهٍ غَيۡرُهٗ‌ ؕ اَفَلَا تَتَّقُوۡنَ‏ ﴿۲۳﴾

24. තවද අපි නූහ්ව ඔහුගේ ජනතාව වෙත එව්වෙමු. තවද ඔහු 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ට නමදිනු. ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නුඹලාට නැත. එසේනම් නුඹලා බියබැතිමත් නොවන්නෙහුදැ?'යි කීවේය.

فَقَالَ الۡمَلَؤُا الَّذِيۡنَ كَفَرُوۡا مِنۡ قَوۡمِهٖ مَا هٰذَاۤ اِلَّا بَشَرٌ مِّثۡلُكُمۡ ۙ يُرِيۡدُ اَنۡ يَّتَفَضَّلَ عَلَيۡكُمۡ‌ ؕ وَلَوۡ شَآءَ اللّٰهُ لَاَنۡزَلَ مَلٰۤـئِكَةً ۖۚ مَّا سَمِعۡنَا بِهٰذَا فِىۡۤ اٰبَآٮِٕنَا الۡاَوَّلِيۡنَ‌ ۚ‏ ﴿۲۴﴾

25. තවද ඔහුගේ ජනතාවගෙන් අවිශ්වාස කළ අයගේ ප්‍රධානීන්, 'මොහු නුඹලා මෙන් මිනිසෙකු මිස නැත. මොහු තමාව නුඹලා කෙරෙහි ශ්‍රේෂ්ඨත්වය ලබා ගැනීමට පතන්නේය. තවද අල්ලාහ් අභිමත වූයේ නම් නියතවශයෙන්ම ඔහුට සුරදූතයින් පහළ කරන්නට තිබුණි. අපගේ මුතුන් මිත්තන් අතුරින් අපි මෙවන් (දෙයක්) කිසිවිටෙකත් අසා නැත්තෙමු'යි කීහ.

اِنۡ هُوَ اِلَّا رَجُلٌۢ بِهٖ جِنَّةٌ فَتَرَبَّصُوۡا بِهٖ حَتّٰى حِيۡنٍ‏ ﴿۲۵﴾

26. 'ඔහු උමතුවෙන් (පෙළෙන්නාවූ) මිනිසෙක් පමණි. එබැවින්, ඔහු සම්බන්ධව ටික කලක් බලා සිටිනු'.

27. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! ඔවුන් මාව මුසාවාදියෙකු සේ සලකා ඇති බැවින් මා හට උදව් කරනු මැනවැ'යි කීවේය.

قَالَ رَبِّ انْصُرْنِي بِمَا كَذَّبُونِ ٢٧

28. එබැවින් අපි ඔහු වෙත (මෙසේ පවසමින්) අනාවරණය පහළ කළෙමු. 'අපගේ ඇස් ඉදිරිපිටද අපගේ අනාවරණය (පරිදිද) නැවක් තනන්න. තවද අපගේ විධානය පැමිණ (පොළොවේ) උල්පත් වේගයෙන් පිටාර ගලන විට, සෑම දෙයින් ජෝඩු බැගින් (අත්‍යවශ්‍ය සතුන්)ද ඔබගේ පවුලේ අයවද ඔබ එහි ඇතුළු කරන්න. නමුත් යමෙකුට එරෙහිව තීරණය තහවුරු වූයේද, ඒ අය හැරෙන්නටය. තවද වැරදි කළ අය සම්බන්ධයෙන් මා හට කතා නොකරන්න. නියතවශයෙන්ම ඔවුන් ගිල්වනු ලබන්නන්ය'.

فَأَوْحَيْنَا إِلَيْهِ أَنِ اصْنَعِ الْفُلْكَ بِأَعْيُنِنَا
وَوَحْيِنَا فَإِذَا جَاءَ أَمْرُنَا وَفَارَ التَّنُّورُ
فَاسْلُكْ فِيهَا مِنْ كُلٍّ زَوْجَيْنِ اثْنَيْنِ
وَأَهْلَكَ إِلَّا مَنْ سَبَقَ عَلَيْهِ الْقَوْلُ
مِنْهُمْ وَلَا تُخَاطِبْنِي فِي الَّذِينَ ظَلَمُوا
إِنَّهُمْ مُغْرَقُونَ ٢٨

29. තවද ඔබ නැවෙහි ගොඩ වූ කල්හි, ඔබද ඔබ සමග සිටින අයද 'අදමිටු ජනතාවගෙන් අපව මුදවාගත් අල්ලාහ්ටම සියළු ප්‍රසංශා හිමියැ'යි පවසන්න.

فَإِذَا اسْتَوَيْتَ أَنْتَ وَمَنْ مَعَكَ عَلَى
الْفُلْكِ فَقُلِ الْحَمْدُ لِلَّهِ الَّذِي نَجَّانَا
مِنَ الْقَوْمِ الظَّالِمِينَ ٢٩

30. තවද 'මාගේ අධිපතියාණෙනි! ආශිර්වාදිත ගොඩබසින තැනකට මා ගොඩබස්වනු මැනව. මන්ද ගොඩබැස්වීමට සලස්වන්නන්ගෙන් ඔබ අති ශ්‍රේෂ්ඨයැ'යි ඔබ පවසන්න.

وَقُلْ رَبِّ أَنْزِلْنِي مُنْزَلًا مُبَارَكًا وَأَنْتَ
خَيْرُ الْمُنْزِلِينَ ٣٠

31. ඇත්තෙන්ම මෙහි සළකුණු ඇත. තවද ඇත්තෙන්ම අපි (මිනිසුන්ව) සැමවිටම පරීක්ෂණයට ලක් කරන්නන් වන්නෙමු.

إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ وَإِنْ كُنَّا لَمُبْتَلِينَ ٣١

32. පසුව අපි ඔවුනට පසු වෙනත් ඇතැම් ජන සමූහයන් ඇතිකළෙමු.

ثُمَّ أَنْشَأْنَا مِنْ بَعْدِهِمْ قَرْنًا آخَرِينَ ٣٢

33. පසුව අපි ඔවුන්ගෙන්ම දූතයෙක්ව ඔවුන් අතර එව්වෙමු.

فَأَرْسَلْنَا فِيهِمْ رَسُولًا مِنْهُمْ أَنِ اعْبُدُوا

اللّٰهَ مَا لَكُمْ مِّنْ اِلٰهٍ غَيْرُهٗ ؕ اَفَلَا تَتَّقُوْنَ ۝٣٣

(ඔහු මෙසේ පැවසුවේය). 'අල්ලාහ්ට නමදිනු. නුඹලාට නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙක් නැත. එසේනම් නුඹලා (අල්ලාහ් කෙරෙහි) බියබැතිමත් නොවන්නෙහුද?'

وَقَالَ الْمَلَاُ مِنْ قَوْمِهِ الَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِلِقَآءِ الْاٰخِرَةِ وَاَتْرَفْنٰهُمْ فِى الْحَيٰوةِ الدُّنْيَا ۙ مَا هٰذَاۤ اِلَّا بَشَرٌ مِّثْلُكُمْ ۙ يَاْكُلُ مِمَّا تَاْكُلُوْنَ مِنْهُ وَيَشْرَبُ مِمَّا تَشْرَبُوْنَ ۝٣٤

34. තවද ඔහුගේ ජනතාවගෙන් අවිශ්වාස කළ අයද පරලොව හමුවීම ගැන ප්‍රතික්ෂේප කළ අයද මෙලෝ ජීවිතයෙහි අප සැප පහසුව සලසා දී ඇති අයද වන මොවුන්ගේ ප්‍රධානීන් (මෙසේ) කීහ. 'මොහු නුඹලා මෙන් මිනිසෙක්මය. නුඹලා අනුභව කරන දෙයින් මොහුද අනුභව කරන්නේය. තවද නුඹලා පානය කරන දෙයින් මොහුද පානය කරන්නේය'.

وَلَئِنْ اَطَعْتُمْ بَشَرًا مِّثْلَكُمْ اِنَّكُمْ اِذًا لَّخٰسِرُوْنَ ۝٣٥

35. 'තවද නුඹලා මෙන් මිනිසෙකුට නුඹලා අවනත වුවහොත්, එවිට නියතවශයෙන්ම නුඹලා පාඩු විඳින්නන් වන්නෙහුමය'.

اَيَعِدُكُمْ اَنَّكُمْ اِذَا مِتُّمْ وَكُنْتُمْ تُرَابًا وَّعِظَامًا اَنَّكُمْ مُّخْرَجُوْنَ ۝٣٦

36. 'නුඹලා මරණයට පත්වී පස් දූවිලි සහ ඇටකටු බවටද පත්වන කල්හි නුඹලා (යළිත් ජීවය ලබා) පිට කරනු ලබන්නේදැයි ඔහු නුඹලාට පොරොන්දු වන්නේද?'

هَيْهَاتَ هَيْهَاتَ لِمَا تُوْعَدُوْنَ ۝٣٧

37. 'නුඹලාට පොරොන්දු දෙනු ලැබූ දේ දුරය (සත්‍යයෙන් බොහෝ) දුරය'.

اِنْ هِىَ اِلَّا حَيَاتُنَا الدُّنْيَا نَمُوْتُ وَنَحْيَا وَمَا نَحْنُ بِمَبْعُوْثِيْنَ ۝٣٨

38. 'අපගේ මෙලෝ ජීවිතය මෙහිම වේ. මෙහිම අපි මැරෙන්නෙමු. තවද (මෙහිම) අපි ජීවත් වන්නෙමු. තවද කිසිවිටෙකත් අපි නැවත නැගිටුවනු නොලබන්නෙමු'.

اِنْ هُوَ اِلَّا رَجُلُ ِۨافْتَرٰى عَلَى اللّٰهِ كَذِبًا وَّمَا نَحْنُ لَهٗ بِمُؤْمِنِيْنَ ۝٣٩

39. 'ඔහු අල්ලාහ්ට එරෙහිව බොරුවක් ගෙතූ මිනිසෙකු මිස නැත. තවද අපි ඔහුව විශ්වාස කරන්නන් නොවෙමු'.

40. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! ඔවුන් මාව මුසාවාදියෙකු සේ සලකා ඇති බැවින් මා හට උදව් කරනු මැනවැ'යි කීවේය.

قَالَ رَبِّ انْصُرْنِىْ بِمَا كَذَّبُوْنِ ﴿٤٠﴾

41. 'ටික කලකින් ඔවුන් නියතවශයෙන්ම කණගාටුවට පත්වන්නන් වන්නෝයැ'යි (අධිපතියාණන්) කීවේය.

قَالَ عَمَّا قَلِيْلٍ لَّيُصْبِحُنَّ نٰدِمِيْنَ ۚ ﴿٤١﴾

42. පසුව ගිගුරුම් සහිත හඬක් ඔවුන්ව නිසිලෙස හසුකර ගත්තේය. තවද අපි ඔවුන්ව කුණුකන්දල් බවට පත්කළෙමු. එමෙන්ම අදමිටු ජනතාව මත ශාප වේවා!

فَاَخَذَتْهُمُ الصَّيْحَةُ بِالْحَقِّ فَجَعَلْنٰهُمْ غُثَآءً ۚ فَبُعْدًا لِّلْقَوْمِ الظّٰلِمِيْنَ ﴿٤٢﴾

43. පසුව අපි ඔවුනට පසු වෙනත් විවිධ ජනසමූහයන් ඇති කළෙමු.

ثُمَّ اَنْشَاْنَا مِنْۢ بَعْدِهِمْ قُرُوْنًا اٰخَرِيْنَ ؕ ﴿٤٣﴾

44. කිසිම ජනතාවකට, ඔවුන්ගේ නියමිත කාලය අභිබවා යා නොහැක. තවද (එය) ඔවුන්ට කල් දැමීමටද නොහැක.

مَا تَسْبِقُ مِنْ اُمَّةٍ اَجَلَهَا وَمَا يَسْتَاْخِرُوْنَ ؕ ﴿٤٤﴾

45. පසුව අපගේ දූතයින්ව කෙනෙකුට පසු කෙනෙකු ලෙස අපි එව්වෙමු. ජනතාව වෙත ඔවුන්ගේ දූතයෙකු පැමිණි සෑම විටම ඔවුහු ඔහුව මුසාවාදියෙකු ලෙස සැළකූහ. එබැවින් අපි අතැමුන්ව ඇතැමුන් ලවා (විනාශය වෙතට) ලුහුබැඳීමට සැලැස්වීමු. තවද අපි ඔවුන්ව හුදු වෘතාන්තයන් බවට පත් කළෙමු. පසුව විශ්වාස නොකරන ජනතාව මත ශාප වේවා!

ثُمَّ اَرْسَلْنَا رُسُلَنَا تَتْرَا ؕ كُلَّمَا جَآءَ اُمَّةً رَّسُوْلُهَا كَذَّبُوْهُ فَاَتْبَعْنَا بَعْضَهُمْ بَعْضًا وَّجَعَلْنٰهُمْ اَحَادِيْثَ ۚ فَبُعْدًا لِّقَوْمٍ لَّا يُؤْمِنُوْنَ ﴿٤٥﴾

46. පසුව අපි මූසා සහ ඔහුගේ සොහොයුරු හාරූන්ව අපගේ සළකුණු සහ පැහැදිලි සාධකයක් සමග එව්වෙමු.

ثُمَّ اَرْسَلْنَا مُوْسٰى وَاَخَاهُ هٰرُوْنَ ۙ بِاٰيٰتِنَا وَسُلْطٰنٍ مُّبِيْنٍ ۙ ﴿٤٦﴾

47. ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් වෙතය. එහෙත් ඔවුහු උඩඟු ලෙස හැසිරුණහ. තවද ඔවුහු අහංකාර ජනතාවක් වූහ.

اِلٰى فِرْعَوْنَ وَمَلَا۟ئِهٖ فَاسْتَكْبَرُوْا وَكَانُوْا قَوْمًا عَالِيْنَ ۚ ﴿٤٧﴾

48. තවද, 'අප වැනි මිනිසුන්

فَقَالُوْٓا اَنُؤْمِنُ لِبَشَرَيْنِ مِثْلِنَا

وَقَوْمُهُمَا لَنَا عٰبِدُوْنَ ۚ ﴿٤٨﴾

දෙදෙනෙකු කෙරෙහි අප විශ්වාස කළ යුතුද? තවද ඔවුන් දෙදෙනාගේ ජනතාව අපගේ වහලුන්ව සිටිති'යි ඔවුහු කීහ.

فَكَذَّبُوْهُمَا فَكَانُوْا مِنَ الْمُهْلَكِيْنَ ﴿٤٩﴾

49. එබැවින් ඔවුන් දෙදෙනාව මුසාවාදීන් ලෙස ඔවුහු සැළකූහ. තවද ඔවුහු විනාශ කරනු ලැබූවන්ගෙන් වූහ.

وَلَقَدْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ لَعَلَّهُمْ يَهْتَدُوْنَ ﴿٥٠﴾

50. තවද ඔවුහු මග පෙන්වනු ලබනු පිණිස අපි මූසාට පුස්තකය දුන්නෙමු.

وَجَعَلْنَا ابْنَ مَرْيَمَ وَاُمَّهٗۤ اٰيَةً وَّ اٰوَيْنٰهُمَاۤ اِلٰى رَبْوَةٍ ذَاتِ قَرَارٍ وَّمَعِيْنٍ ۚ ﴿٥١﴾

51. තවද අපි මරියම්ගේ පුත්‍රයාද ඔහුගේ මවද සළකුණක් කළෙමු. තවද අපි ඔවුන් දෙදෙනාට ගලන දිය උල්පත් සහිත අභය ස්ථානයක්වූ උස්බිමක රැකවරණය දුන්නෙමු.

يٰۤاَيُّهَا الرُّسُلُ كُلُوْا مِنَ الطَّيِّبٰتِ وَاعْمَلُوْا صَالِحًا ؕ اِنِّيْ بِمَا تَعْمَلُوْنَ عَلِيْمٌ ؕ ﴿٥٢﴾

52. එම්බල දූතයිනි! පවිත්‍ර දෙයින් අනුභව කරනු. තවද යහපත් ක්‍රියා කරනු. ඇත්තෙන්ම ඔබලා කරන දේ පිළිබඳව මම මැනැවින් දනිමි.

وَاِنَّ هٰذِهٖۤ اُمَّتُكُمْ اُمَّةً وَّاحِدَةً وَّاَنَا رَبُّكُمْ فَاتَّقُوْنِ ﴿٥٣﴾

53. තවද නියතවශයෙන්ම ඔබලාගේ මෙම සමූහය එක් සමූහයකි. එමෙන්ම මම ඔබලාගේ අධිපතියාණන් වෙමි. එබැවින් මා හට (පමණක්) බිය බැතිමත් වනු.

فَتَقَطَّعُوْۤا اَمْرَهُمْ بَيْنَهُمْ زُبُرًا ؕ كُلُّ حِزْبٍۢ بِمَا لَدَيْهِمْ فَرِحُوْنَ ﴿٥٤﴾

54. ඔවුන් තමන්ගේ (ආගම් මතයන් සම්බන්ධ) කටයුතු ඔවුනතර කැබලි කැබලි වලට බෙදා ගත්හ. එක් එක් පාර්ශවයන් තමන් වෙත ඇති දේ පිළිබඳව ආඩම්බරයෙන් ප්‍රීති වූහ.

فَذَرْهُمْ فِيْ غَمْرَتِهِمْ حَتّٰى حِيْنٍ ﴿٥٥﴾

55. එබැවින් ඔවුන්ගේ අධම කමෙහි සිටීමට ඔවුන්ව කලකට ඉඩ හරින්න.

اَيَحْسَبُوْنَ اَنَّمَا نُمِدُّهُمْ بِهٖ مِنْ مَّالٍ وَّبَنِيْنَ ۙ ﴿٥٦﴾

56. අප ඔවුන්ට වස්තුව සහ දරුවන් මගින් උදව් කරන්නේ යැයි ඔවුන් සිතන්නෙහුද?

نُسَارِعُ لَهُمْ فِي الْخَيْرٰتِ ۭ بَلْ لَّا يَشْعُرُوْنَ ۝٥٧

57. අප ඔවුන් වෙනුවෙන් යහපත් කිරීමෙහිලා ඉක්මන් වන්නේද? නොඑසේය! නමුත් ඔවුන් තේරුම් නොගනිති.

اِنَّ الَّذِيْنَ هُمْ مِّنْ خَشْيَةِ رَبِّهِمْ مُّشْفِقُوْنَ ۝٥٨

58. ඇත්තෙන්ම තම අධිපතියාණන් හට ඇති බිය හේතුවෙන් නිරතුරුවම (පවට එරෙහිව) අවධානයෙන් කටයුතු කරන අයද,

وَالَّذِيْنَ هُمْ بِاٰيٰتِ رَبِّهِمْ يُؤْمِنُوْنَ ۝٥٩

59. තවද තම අධිපතියාණන්ගේ සළකුණු කෙරෙහි විශ්වාස කරන අයද,

وَالَّذِيْنَ هُمْ بِرَبِّهِمْ لَا يُشْرِكُوْنَ ۝٦٠

60. තවද තම අධිපතියාණන් හට සමානයන් ඇති නොකරන අයද,

وَالَّذِيْنَ يُؤْتُوْنَ مَآ اٰتَوْا وَّقُلُوْبُهُمْ وَجِلَةٌ اَنَّهُمْ اِلٰى رَبِّهِمْ رٰجِعُوْنَ ۝٦١

61. තවද ඔවුන් තම අධිපතියාණන් වෙත ආපසු පැමිණෙන්නන් වන බැවින් තමන්ගේ හදවත් ගරුසරු බියෙන් යුතුව (තම අධිපතියාණන්ගෙන්) තමන්ට දෙන ලද දේ (සුදුසු අයට) දෙන අයද,

اُولٰۗىِٕكَ يُسٰرِعُوْنَ فِي الْخَيْرٰتِ وَهُمْ لَهَا سٰبِقُوْنَ ۝٦٢

62. යහපත් කිරීමෙහිලා ඉක්මන් වන අයද මොවුන්මය. තවද ඒවායෙහි පෙරමුණ ගන්නන්ද මොවුන්මය.

وَلَا نُكَلِّفُ نَفْسًا اِلَّا وُسْعَهَا وَلَدَيْنَا كِتٰبٌ يَّنْطِقُ بِالْحَقِّ وَهُمْ لَا يُظْلَمُوْنَ ۝٦٣

63. තවද අපි කිසිදු ආත්මයකට එයගේ ශක්තිය ඉක්මවා බර නොපටවන්නෙමු. තවද අප වෙත සත්‍ය පවසන පොතක් ඇත. තවද ඔවුනට අසාධාරණයක් කරනු නොලැබේ.

بَلْ قُلُوْبُهُمْ فِيْ غَمْرَةٍ مِّنْ هٰذَا وَلَهُمْ اَعْمَالٌ مِّنْ دُوْنِ ذٰلِكَ هُمْ لَهَا عٰمِلُوْنَ ۝٦٤

64. නමුත් ඔවුන්ගේ හදවත් මෙම (පොත) පිළිබඳව මුළුමනින්ම නොතැකීමෙහිය. තවද ඒ හැරෙන්නට ඔවුන් නියැලී සිටින තවත් (නපුරු) ක්‍රියාවන්ද ඔවුනට ඇත.

حَتّٰٓى اِذَآ اَخَذْنَا مُتْرَفِيْهِمْ بِالْعَذَابِ اِذَا هُمْ يَجْــَٔــرُوْنَ ۝٦٥

65. යම්තාක්දයත් සුඛෝපභෝගයෙන් පසුවන අයව දඬුවමින් අප හසුකරන විට එසැනින්ම ඔවුන් උදව් පතා කන්නලව් කරති.

66. 'මෙම දිනයෙහි උදව් ඉල්ලා කන්නලව් නොකරනු. නියත වශයෙන්ම නුඹලාට අපගෙන් උදව් දෙනු නොලබන්නේය'.

لَا تَجْـَٔرُوا الْيَوْمَ ۖ اِنَّكُمْ مِّنَّا لَا تُنْصَرُوْنَ ٦٦

67. 'ඇත්තෙන්ම මාගේ සළකුණු නුඹලාට කියවනු ලැබුවේය. නමුත් නුඹලා, නුඹලාගේ විලුඹින් ආපසු හැරි යමින් සිටියෙහුය'.

قَدْ كَانَتْ اٰيٰتِيْ تُتْلٰى عَلَيْكُمْ فَكُنْتُمْ عَلٰٓى اَعْقَابِكُمْ تَنْكِصُوْنَ ۙ ٦٧

68. 'මහත් ආඩම්බරයෙන් යුතුව රාත්‍රියේදී එය(කුර්ආනය) පිළිබඳව විකාර බස් දොඩවමින් කතන්දරයන් කියමින් සිටියෙහුය'.

مُسْتَكْبِرِيْنَ ۖ بِهٖ سٰمِرًا تَهْجُرُوْنَ ٦٨

69. එසේ නම් ඔවුන් (දේව) වාක්‍ය ගැන සිතා නොබැලුවේද? නැතහොත් පෙර විසූ ඔවුන්ගේ පියවරුන්ට නොපැමිණි දේ ඔවුනට පැමිණියේද?

اَفَلَمْ يَدَّبَّرُوا الْقَوْلَ اَمْ جَآءَهُمْ مَّا لَمْ يَاْتِ اٰبَآءَهُمُ الْاَوَّلِيْنَ ٦٩

70. නැතහොත් ඔවුහු තමන්ගේ දූතයාව හඳුනා නොගත්තෙහුද? එහෙයින් ඔවුහු (මෙලෙස) ඔහුව ප්‍රතික්ෂේප කරති.

اَمْ لَمْ يَعْرِفُوْا رَسُوْلَهُمْ فَهُمْ لَهٗ مُنْكِرُوْنَ ٧٠

71. නැතහොත් ඔහුට උමතුකම තිබේ යැයි ඔවුහු කියන්නෙහුද? නොඑසේය, ඔහු ඔවුනට සත්‍යය ගෙන ආවේය. තවද ඔවුන්ගෙන් බහුතරයක් සත්‍යය පිළිකුල් කරති.

اَمْ يَقُوْلُوْنَ بِهٖ جِنَّةٌ ۗ بَلْ جَآءَهُمْ بِالْحَقِّ وَاَكْثَرُهُمْ لِلْحَقِّ كٰرِهُوْنَ ٧١

72. තවද එම සත්‍යය ඔවුන්ගේ අභිලාශයන් අනුගමනය කළේ නම් අහස්ද පොළොවද ඒවායෙහි ඇති සියල්ලද අවුල් ජාලයක් බවට හැරෙනු ඇත. නොඑසේය, අපි ඔවුනට ඔවුන්ගේ අනුශාසනාව ගෙන ආවෙමු, නමුත් ඔවුහු (දැන්) ඔවුන්ගේම අනුශාසනාවෙන් හැර යති.

وَلَوِ اتَّبَعَ الْحَقُّ اَهْوَآءَهُمْ لَفَسَدَتِ السَّمٰوٰتُ وَالْاَرْضُ وَمَنْ فِيْهِنَّ ۗ بَلْ اَتَيْنٰهُمْ بِذِكْرِهِمْ فَهُمْ عَنْ ذِكْرِهِمْ مُّعْرِضُوْنَ ٧٢

73. නැතහොත් ඔබ ඔවුන්ගෙන් යම් තිළිණයක් ඉල්ලන්නේද? නමුත් ඔබ අධිපතියාණන්ගේ තිළිණය අති

اَمْ تَسْـَٔلُهُمْ خَرْجًا فَخَرَاجُ رَبِّكَ خَيْرٌ ۖ

وَهُوَ خَيْرُ الرّٰزِقِيْنَ ﴿٧٣﴾

ශ්‍රේෂ්ඨය. තවද ඔහු පිවනෝපාය සපයන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨයාය.

وَاِنَّكَ لَتَدْعُوْهُمْ اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٧٤﴾

74. තවද නියතවශයෙන්ම ඔබ ඔවුන්ව ඍජු මග වෙතට කැඳවන්නෙහිය.

وَاِنَّ الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ عَنِ الصِّرَاطِ لَنٰكِبُوْنَ ﴿٧٥﴾

75. තවද පරලොව කෙරෙහි විශ්වාස නොකරන අය ඇත්තෙන්ම එම මාර්ගයෙන් ඉවත්ව යන්නන්ය.

وَلَوْ رَحِمْنٰهُمْ وَكَشَفْنَا مَا بِهِمْ مِّنْ ضُرٍّ لَّلَجُّوْا فِيْ طُغْيَانِهِمْ يَعْمَهُوْنَ ﴿٧٦﴾

76. එමෙන්ම අපි ඔවුන්හට දයාව දක්වා ඔවුන්ගේ විපතින් ඔවුන්ව මුදවා ගත්තේ නම් වුවද ඔවුන් ඔවුන්ගේ සීමාව ඉක්මවීමෙහිම නිරතවී අන්ධව අයාලේ යනු ඇත.

وَلَقَدْ اَخَذْنٰهُمْ بِالْعَذَابِ فَمَا اسْتَكَانُوْا لِرَبِّهِمْ وَمَا يَتَضَرَّعُوْنَ ﴿٧٧﴾

77. අපි ඔවුන්ව දඬුවමක් මගින් හසු කළෙමු. එහෙත් ඔවුහු තමන්ගේ අධිපතියාණන්ට යටහත් නොවූහ. තවද ඔවුහු (බැගෑපත්ව) ආයාචනා නොකරන්නෝය.

حَتّٰىٓ اِذَا فَتَحْنَا عَلَيْهِمْ بَابًا ذَا عَذَابٍ شَدِيْدٍ اِذَا هُمْ فِيْهِ مُبْلِسُوْنَ ﴿٧٨﴾

78. යම්තාක්දයත් අපි ඔවුනට දැඩි දඬුවමක දොරටුව විවර කරනවිට බලනු! ඔවුන් එයින්ද බලාපොරොත්තු සුන් කරගන්නන්ය.

وَهُوَ الَّذِيْٓ اَنْشَاَ لَكُمُ السَّمْعَ وَالْاَبْصَارَ وَالْاَفْـِٕدَةَ ؕ قَلِيْلًا مَّا تَشْكُرُوْنَ ﴿٧٩﴾

79. එමෙන්ම නුඹලාට කන්ද ඇස්ද හදවත්ද මැව්වේ ඔහුමය. (නමුත්) නුඹලා කෘතඥතා දක්වනුයේ ඉතා ස්වල්පයකි.

وَهُوَ الَّذِيْ ذَرَاَكُمْ فِى الْاَرْضِ وَاِلَيْهِ تُحْشَرُوْنَ ﴿٨٠﴾

80. එමෙන්ම නුඹලාව පොළොවෙහි බෝ කළේ ඔහුමය. තවද ඔහු වෙතටම නුඹලා එක්රැස් කරනු ලබන්නෙහුය.

وَهُوَ الَّذِيْ يُحْيٖ وَيُمِيْتُ وَلَهُ اخْتِلَافُ الَّيْلِ وَالنَّهَارِ ؕ اَفَلَا تَعْقِلُوْنَ ﴿٨١﴾

81. එමෙන්ම පිවය දෙන්නේද මරණයට පත් කරන්නේද ඔහුමය. තවද රාත්‍රිය සහ දහවල මාරු වීමද ඔහු සතුමය. එසේනම් නුඹලා තේරුම් නොගන්නෙහුද?

| | |
|---|---|
| بَلْ قَالُوْا مِثْلَ مَا قَالَ الْاَوَّلُوْنَ ﴿٨٢﴾ | 82. නමුත් පෙර සිටි ජනතාව කියු පරිදිම ඔවුහුද කියති. |
| قَالُوْٓا ءَاِذَا مِتْنَا وَكُنَّا تُرَابًا وَّ عِظَامًا ءَاِنَّا لَمَبْعُوْثُوْنَ ﴿٨٣﴾ | 83. ඔවුහු 'කිමද! අපි මරණයට පත්වී (හුදු) පස් දූවිලි සහ ඇටකටු බවට පත්වූ පසුවත් අපි නැවතත් නැගිටවනු ලබන්නෙමුදැ'යි කියති. |
| لَقَدْ وُعِدْنَا نَحْنُ وَاٰبَآؤُنَا هٰذَا مِنْ قَبْلُ اِنْ هٰذَآ اِلَّآ اَسَاطِيْرُ الْاَوَّلِيْنَ ﴿٨٤﴾ | 84. 'මීට පෙරද මෙම ප්‍රතිඥාව අපටද අපගේ පියවරුන්ටද දෙනු ලැබුවේය. මෙය පැරැන්නන්ගේ කතාන්තර මිස අන්දෙයක් නැත'. |
| قُلْ لِّمَنِ الْاَرْضُ وَمَنْ فِيْهَآ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿٨٥﴾ | 85. පවසන්න, 'පොළොවද එහි ඇති සියල්ලද අයිති වනුයේ කවරෙකුටදැයි නුඹලා දන්නේ නම් (කියනු)?' |
| سَيَقُوْلُوْنَ لِلّٰهِ ؕ قُلْ اَفَلَا تَذَكَّرُوْنَ ﴿٨٦﴾ | 86. 'අල්ලාහ්ට යැ'යි ඔවුහු කියන්නෝය. 'එසේ නම් නුඹලා දැනමුතුකම් නොලබන්නෙහුදැ?'යි පවසන්න. |
| قُلْ مَنْ رَّبُّ السَّمٰوٰتِ السَّبْعِ وَرَبُّ الْعَرْشِ الْعَظِيْمِ ﴿٨٧﴾ | 87. 'අහස් සතෙහි අධිපතියාණන් මෙන්ම මහත්වූ සිංහාසනයෙහි අධිපතියාණන් කවුරුන්දැ?'යි අසන්න. |
| سَيَقُوْلُوْنَ لِلّٰهِ ؕ قُلْ اَفَلَا تَتَّقُوْنَ ﴿٨٨﴾ | 88. 'ඒවා අල්ලාහ්ට අයත් යැ'යි ඔවුහු කියන්නෝය. 'එසේ නම් නුඹලා බියබැතිමත් නොවන්නෙහුදැ?'යි පවසන්න. |
| قُلْ مَنْ بِيَدِهٖ مَلَكُوْتُ كُلِّ شَيْءٍ وَّهُوَ يُجِيْرُ وَلَا يُجَارُ عَلَيْهِ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿٨٩﴾ | 89. 'සියලු දෙයෙහි ආධිපත්‍යය කවරෙකුගේ අතෙහිද, ඔහුම රැකවරණය දෙන්නේය. නමුත් ඔහුට එරෙහිව කිසිම රැකවරණයක් නොමැත. නුඹලා දන්නේ නම් (කියනු)' යැයි පවසන්න. |
| سَيَقُوْلُوْنَ لِلّٰهِ ؕ قُلْ فَاَنّٰى تُسْحَرُوْنَ ﴿٩٠﴾ | 90. '(මෙය සියල්ලම) අල්ලාහ්ට (හිමි) යැ'යි ඔවුන් කියන්නෝය. 'එසේනම් නුඹලා මුළා කරනු ලැබුවේ කෙසේදැ?'යි අසන්න. |

بَلْ أَتَيْنَٰهُم بِٱلْحَقِّ وَإِنَّهُمْ لَكَٰذِبُونَ ﴿٩١﴾

91. ඇත්ත මෙයයි, අපි ඔවුනට සත්‍යය ගෙන ආවෙමු. තවද ඔවුන් නියතවශයෙන්ම බොරුකාරයින්ය.

مَا ٱتَّخَذَ ٱللَّهُ مِن وَلَدٍ وَمَا كَانَ مَعَهُۥ مِنْ إِلَٰهٍ إِذًا لَّذَهَبَ كُلُّ إِلَٰهٍۭ بِمَا خَلَقَ وَلَعَلَا بَعْضُهُمْ عَلَىٰ بَعْضٍ ۚ سُبْحَٰنَ ٱللَّهِ عَمَّا يَصِفُونَ ﴿٩٢﴾

92. අල්ලාහ් තමාට කිසිදු පුතෙකු ගෙන නොමැත. එමෙන්ම ඔහු සමග (වෙනත්) දෙවියෙක්ද නොමැත. එය එසේ වුවහොත් සෑම දෙවියෙක්ම තමා මැවූ දේ වෙන්කරගනු ඇත. එමෙන්ම නියතවශයෙන්ම ඔවුන්ගෙන් සමහරුන් තවත් සමහරුන් මත අධිපතිකම් කරනු ඇත. ඔවුන් ආරෝපණය කරන සියලු දේට වඩා අල්ලාහ් සුවිශුද්ධය.

عَٰلِمِ ٱلْغَيْبِ وَٱلشَّهَٰدَةِ فَتَعَٰلَىٰ عَمَّا يُشْرِكُونَ ﴿٩٣﴾

93. අදෘශ්‍යමාන දේද දෘශ්‍යමාන දේද දත්තාය. ඔවුන් (ඔහුට) සමාන තබන දේ සියල්ලට වඩා ඔහු අති උසස්ය.

قُل رَّبِّ إِمَّا تُرِيَنِّى مَا يُوعَدُونَ ﴿٩٤﴾

94. 'මාගේ අධිපතියාණෙනි! ඔබ මාහට පෙන්වා දෙන්නේ නම්, ඔවුන් කුමක් මගින් බිය ගන්වනු ලබන්නේදැ'යි පවසන්න.

رَبِّ فَلَا تَجْعَلْنِى فِى ٱلْقَوْمِ ٱلظَّٰلِمِينَ ﴿٩٥﴾

95. 'මාගේ අධිපතියාණෙනි! මාව අදමිටු ජනතාව සමග නොතබනු මැනව'.

وَإِنَّا عَلَىٰٓ أَن نُّرِيَكَ مَا نَعِدُهُمْ لَقَٰدِرُونَ ﴿٩٦﴾

96. තවද අපි ඔවුන්ව බිය ගන්වනු ලබන දේ ඔබට පෙන්වීමට නිසැකවම අපට බලය ඇත.

ٱدْفَعْ بِٱلَّتِى هِىَ أَحْسَنُ ٱلسَّيِّئَةَ ۚ نَحْنُ أَعْلَمُ بِمَا يَصِفُونَ ﴿٩٧﴾

97. ඉතාමත් යහපත් දෙයින් නපුර පලවා හරින්න. ඔවුන් දෝෂාරෝපණය කරන දේ අපි ඉතා මැනැවින් දන්නෙමු.

وَقُل رَّبِّ أَعُوذُ بِكَ مِنْ هَمَزَٰتِ ٱلشَّيَٰطِينِ ﴿٩٨﴾

98. තවද 'මාගේ අධිපතියාණෙනි! ෂෙයිතානුන්ගේ පෙළඹවීම් වලින් මා ඔබගෙන් සරණ පතන්නෙමි'යි පවසන්න.

وَأَعُوذُ بِكَ رَبِّ أَن يَحْضُرُونِ ﴿٩٩﴾

99. 'තවද මාගේ අධිපතියාණෙනි, ඔවුන් මා සමීපයට ඒමෙන් මා ඔබගෙන් සරණ පතමි'.

| | |
|---|---|
| 100. යම්තාක්දයත් ඔවුන්ගෙන් කෙනෙකුට මරණය පැමිණෙන විට ඔහු, 'මාගේ අධිපතියාණෙනි! මාව ආපසු යවනු මැනවැ'යි (කන්නලව් කරමින්) කියයි. | حَتّٰٓى اِذَا جَآءَ اَحَدَهُمُ الْمَوْتُ قَالَ رَبِّ ارْجِعُوْنِ ﴿١٠٠﴾ |
| 101. 'මා හැර ආ දෙයහි (ලෝකයෙහි) ධාර්මිෂ්ඨ ක්‍රියාවන් මා කරනු පිණිසය'. කිසිවිටෙකත් නොව, එය ඔහු දොඩවන වචනයක් පමණි. තවද ඔවුන් නැවත නැගිටවනු ලබන දිනය තෙක් ඔවුන්ගේ පිටුපස බාධකයක් ඇත. | لَعَلِّيْٓ اَعْمَلُ صَالِحًا فِيْمَا تَرَكْتُ كَلَّا ؕ اِنَّهَا كَلِمَةٌ هُوَ قَآئِلُهَا ؕ وَمِنْ وَّرَآئِهِمْ بَرْزَخٌ اِلٰى يَوْمِ يُبْعَثُوْنَ ﴿١٠١﴾ |
| 102. තවද සූර් (නලාව) පිඹිනු ලබන විට, එදින ඔවුන් අතර කිසිදු නෑ කමක් නොවනු ඇත. තවද ඔවුන් එකිනෙකා ගැන නොවිමසනු ඇත. | فَاِذَا نُفِخَ فِى الصُّوْرِ فَلَآ اَنْسَابَ بَيْنَهُمْ يَوْمَئِذٍ وَّلَا يَتَسَآءَلُوْنَ ﴿١٠٢﴾ |
| 103. පසුව කවරෙකුගේ (ක්‍රියාවන්හි) තරාදීන් බර වන්නේද, ජයග්‍රහණය ලබන්නන් ඔවුන්මය. | فَمَنْ ثَقُلَتْ مَوَازِيْنُهٗ فَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ﴿١٠٣﴾ |
| 104. තවද කවරෙකුගේ (යහපත් ක්‍රියාවන්හි) තරාදි සැහැල්ලු වන්නේද, ඔවුන්ම තමන්ගේ ආත්මයන් විනාශ කරගත්තෝය. ඔවුන් නිරයේ දිගුකල් වෙසෙන්නෝය. | وَمَنْ خَفَّتْ مَوَازِيْنُهٗ فَاُولٰٓئِكَ الَّذِيْنَ خَسِرُوْٓا اَنْفُسَهُمْ فِيْ جَهَنَّمَ خٰلِدُوْنَ ﴿١٠٤﴾ |
| 105. ගින්න ඔවුන්ගේ මුහුණු දවාලන්නේය. තවද ඔවුන් එහි (කටුක වේදනාවෙන්) දත් නියවමින් සිටින්නෝය. | تَلْفَحُ وُجُوْهَهُمُ النَّارُ وَهُمْ فِيْهَا كٰلِحُوْنَ ﴿١٠٥﴾ |
| 106. 'මාගේ වදන් නුඹලාට පාරායනා කරනු නොලැබුවේද? තවද නුඹලා ඒවා මුසාවන් ලෙස සැලකුවෙහුය'. | اَلَمْ تَكُنْ اٰيٰتِيْ تُتْلٰى عَلَيْكُمْ فَكُنْتُمْ بِهَا تُكَذِّبُوْنَ ﴿١٠٦﴾ |
| 107. 'අපගේ අධිපතියාණෙනි! අපගේ අභාග්‍යකම අපව අභිබවා ගියේය. තවද අපි නොමග ගිය ජනතාවක් වූවෙමු'යි ඔවුන් පවසන්නෝය. | قَالُوْا رَبَّنَا غَلَبَتْ عَلَيْنَا شِقْوَتُنَا وَكُنَّا قَوْمًا ضَآلِّيْنَ ﴿١٠٧﴾ |
| 108. 'අපගේ අධිපතියාණෙනි! අපව මෙයින් බැහැර කරනු මැනව. පසුව | رَبَّنَآ اَخْرِجْنَا مِنْهَا فَاِنْ عُدْنَا فَاِنَّا |

ظٰلِمُوْنَ ١٠٨

අපි (අකීකරුභාවයට) නැවත පැමිණියහොත්, අපි ඇත්තෙන්ම වරදකරුවන් වන්නෙමු'.

قَالَ اخْسَـُٔوْا فِيْهَا وَلَا تُكَلِّمُوْنِ ١٠٩

109. "'මෙහිම විනාශ වී යනු. තවද මා සමග කතා නොකරනු'යි (අධිපතියාණන්) පවසන්නේය".

اِنَّهٗ كَانَ فَرِيْقٌ مِّنْ عِبَادِيْ يَقُوْلُوْنَ رَبَّنَآ اٰمَنَّا فَاغْفِرْ لَنَا وَارْحَمْنَا وَاَنْتَ خَيْرُ الرّٰحِمِيْنَ ١١٠

110. "නියතවශයෙන්ම මාගේ දාසයින්ගෙන් පිරිසක් (මෙසේ) කීහ. 'අපගේ අධිපතියාණෙනි! අපි විශ්වාස කළෙමු. එමනිසා (අපගේ පව්) අපට ක්ෂමා කර දෙනු මැනව. තවද අපට දයාව දක්වනු මැනව. තවද ඔබ දයාව දක්වන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨය'.

فَاتَّخَذْتُمُوْهُمْ سِخْرِيًّا حَتّٰٓى اَنْسَوْكُمْ ذِكْرِيْ وَكُنْتُمْ مِّنْهُمْ تَضْحَكُوْنَ ١١١

111. නුඹලා මා සිහිකිරීම අමතක කරන තුරු නුඹලා ඔවුන්ව සමච්චලයට ගත්තෙහුය. තවද නුඹලා ඔවුන්ට සිනාසෙමින් සිටියෙහුය".

اِنِّيْ جَزَيْتُهُمُ الْيَوْمَ بِمَا صَبَرُوْٓا اَنَّهُمْ هُمُ الْفَآئِزُوْنَ ١١٢

112. ඔවුන්ගේ ඉවසිලිවන්තකම නිසා ඔවුනට අද දින මම තිළිණ දී ඇත්තෙමි. එබැවින් ජයග්‍රහණය ලැබුවන් ඔවුන්මය".

قٰلَ كَمْ لَبِثْتُمْ فِى الْاَرْضِ عَدَدَ سِنِيْنَ ١١٣

113. 'නුඹලා කොපමණ වසරක් පොළොවෙහි ගත කළෙහුද,?'යි (අධිපතියාණන්) අසනු ඇත.

قَالُوْا لَبِثْنَا يَوْمًا اَوْ بَعْضَ يَوْمٍ فَسْـَٔلِ الْعَآدِّيْنَ ١١٤

114. ඔවුහු, 'අපි දවසක් හෝ දවසකින් කොටසක් ගත කළෙමු. නමුත් ගණන් ගන්නන්ගෙන් අසන්නැ'යි කියන්නෝය.

قٰلَ اِنْ لَّبِثْتُمْ اِلَّا قَلِيْلًا لَّوْ اَنَّكُمْ كُنْتُمْ تَعْلَمُوْنَ ١١٥

115. නුඹලා ගතකළේ ස්වල්ප (කාල)යකි. 'නුඹලා දන්නේ නම්!' යැයි ඔහු කියනු ඇත.

اَفَحَسِبْتُمْ اَنَّمَا خَلَقْنٰكُمْ عَبَثًا وَّاَنَّكُمْ اِلَيْنَا لَا تُرْجَعُوْنَ ١١٦

116. 'අරමුණක් නොමැතිව අපි නුඹලාව මවා ඇති බවත් නුඹලා ආපසු අප වෙතට ගෙන එනු නොලබන බවත් නුඹලා සිතුවෙහුද?'

فَتَعٰلَى اللّٰهُ الْمَلِكُ الْحَقُّ ۚ لَآ اِلٰهَ اِلَّا هُوَ ۚ رَبُّ الْعَرْشِ الْكَرِيْمِ ﴿١١٧﴾

117. අති උසස් වූ අල්ලාහ් සත්‍ය රජෙකුය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නොමැත. කීර්තිමත් සිංහාසනයේ අධිපතියාණන්ය.

وَمَنْ يَّدْعُ مَعَ اللّٰهِ اِلٰهًا اٰخَرَ ۙ لَا بُرْهَانَ لَهٗ بِهٖ ۙ فَاِنَّمَا حِسَابُهٗ عِنْدَ رَبِّهٖ ؕ اِنَّهٗ لَا يُفْلِحُ الْكٰفِرُوْنَ ﴿١١٨﴾

118. තවද කිසිදු සාධකයක් නොමැතිව යමෙක් අල්ලාහ් සමග වෙනත් දෙවියෙකුව කැඳවන්නේද, ඔහුගේ ගණන් ගැනීම ඔහුගේ අධිපතියාණන් වෙතය. නියතවශයෙන්ම අවිශ්වාසිතයින් සෞභාග්‍යමත් නොවනු ඇත.

وَقُلْ رَّبِّ اغْفِرْ وَارْحَمْ وَاَنْتَ خَيْرُ الرّٰحِمِيْنَ ﴿١١٩﴾

119. තවද 'මාගේ අධිපතියාණෙනි! මාහට ක්ෂමා කර දයාව දක්වනු මැනව. තවද ඔබ දයාව දක්වන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨයැ'යි පවසන්න.



අල් නූර්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

سُوۡرَةٌ اَنۡزَلۡنٰهَا وَفَرَضۡنٰهَا وَاَنۡزَلۡنَا فِيۡهَاۤ اٰيٰتٍۭ بَيِّنٰتٍ لَّعَلَّكُمۡ تَذَكَّرُوۡنَ ②

2. (මෙය) පරිච්ඡේදයකි. අපි එය පහළ කර ඇත්තෙමු. තවද අපි එය අනිවාර්ය කර ඇත්තෙමු. තවද නුඹලා අවධානයට ගනු පිණිස අපි එහි පැහැදිලි සළකුණු පහළ කර ඇත්තෙමු.

اَلزَّانِيَةُ وَالزَّانِىۡ فَاجۡلِدُوۡا كُلَّ وَاحِدٍ مِّنۡهُمَا مِائَةَ جَلۡدَةٍ‌ وَّلَا تَاۡخُذۡكُمۡ بِهِمَا رَاۡفَةٌ فِىۡ دِيۡنِ اللّٰهِ اِنۡ كُنۡتُمۡ تُؤۡمِنُوۡنَ بِاللّٰهِ وَالۡيَوۡمِ الۡاٰخِرِ‌ۚ وَلۡيَشۡهَدۡ عَذَابَهُمَا طَآٮِٕفَةٌ مِّنَ الۡمُؤۡمِنِيۡنَ ③

3. පරපුරුෂ සේවනයේ යෙදෙන්නි සහ පරදාර සේවනයේ යෙදෙන්නා වන ඔවුන් දෙදෙනාගෙන් එක් එක්කෙනාට කස පහරවල් සියයක් බැගින් ගසනු. නුඹලා අල්ලාහ් කෙරෙහිද අවසාන දිනය කෙරෙහිද විශ්වාස කරන්නේ නම්, දේව නීතිය (ක්‍රියාත්මක කිරීමේදී) නුඹලාට ඔවුන් දෙදෙනා කෙරෙහි අනුකම්පාව ඇති නොවිය යුතුය. තවද විශ්වාසිතයින්ගෙන් පිරිසක් ඔවුන්ගේ දඬුවමට සාක්ෂි දරත්වා.

اَلزَّانِىۡ لَا يَنۡكِحُ اِلَّا زَانِيَةً اَوۡ مُشۡرِكَةً وَّالزَّانِيَةُ لَا يَنۡكِحُهَاۤ اِلَّا زَانٍ اَوۡ مُشۡرِكٌ‌ۚ وَحُرِّمَ ذٰ لِكَ عَلَى الۡمُؤۡمِنِيۡنَ ④

4. පරදාර සේවනයෙහි යෙදෙන්නා පරපුරුෂ සේවනයෙහි යෙදෙන්නියක හෝ ප්‍රතිමා පුදන ස්ත්‍රියක හැර (සාමාන්‍යයෙන් අන් කිසිවෙකු) සමග ඇසුරු කරගන්නේ නැත. තවද පරපුරුෂ සේවනයෙහි යෙදෙන්නි පරදාර සේවනයෙහි යෙදෙන්නෙකු හෝ ප්‍රතිමා පුදන පුරුෂයෙකු හැර (සාමාන්‍යයෙන් අන් කිසිවෙකු) සමග ඇසුරු කරගන්නේ නැත. එය ඇත්තෙන්ම විශ්වාසිතයින්ට තහනම් කරන ලදී.

وَالَّذِيۡنَ يَرۡمُوۡنَ الۡمُحۡصَنٰتِ ثُمَّ لَمۡ يَاۡتُوۡا بِاَرۡبَعَةِ شُهَدَآءَ فَاجۡلِدُوۡهُمۡ ثَمٰنِيۡنَ

5. තවද පතිවත රකින ස්ත්‍රීන් හට අයුතු චෝදනා නගමින් පසුව සාක්ෂි කරුවන් සතරක් නොගෙනෙන අයට, කස පහර අසුවක් දෙනු. තවද (ඉන්

جَلْدَةً وَّلَا تَقْبَلُوْا لَهُمْ شَهَادَةً اَبَدًا ۚ وَاُولٰٓئِكَ هُمُ الْفٰسِقُوْنَ ۙ﴿٥﴾

පසුවද) ඔවුන්ගේ සාක්ෂිය කිසිවිටෙකත් භාර නොගනු. තවද සීමාව ඉක්මවන්නන් ඔවුන්මය.

اِلَّا الَّذِيْنَ تَابُوْا مِنْۢ بَعْدِ ذٰلِكَ وَاَصْلَحُوْا ۚ فَاِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٦﴾

6. ඉන්පසුව පසුතැවිලි වී නිවැරදි කරගන්නා අය හැරෙන්නටය. ඇත්තවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَالَّذِيْنَ يَرْمُوْنَ اَزْوَاجَهُمْ وَلَمْ يَكُنْ لَّهُمْ شُهَدَآءُ اِلَّآ اَنْفُسُهُمْ فَشَهَادَةُ اَحَدِهِمْ اَرْبَعُ شَهٰدٰتٍۭ بِاللّٰهِ ۙ اِنَّهٗ لَمِنَ الصّٰدِقِيْنَ ﴿٧﴾

7. එමෙන්ම තමන්ගේ භාර්යයාවන් හට අයුතු චෝදනා නගමින්, තමන් හැර අන් සාක්ෂියක් ඔවුනට නොමැති නම්, ඔවුන්ගෙන් සෑම කෙනෙකුම අල්ලාහ්ගේ නාමයෙන් දිවුරා නියතවශයෙන්ම තමා සත්‍ය පවසන්නන්ගෙන් කෙනෙකු බවට සිව් වතාවක් සාක්ෂි දිය යුතුය.

وَالْخَامِسَةُ اَنَّ لَعْنَتَ اللّٰهِ عَلَيْهِ اِنْ كَانَ مِنَ الْكٰذِبِيْنَ ﴿٨﴾

8. තවද (තමාගේ) පස්වැනි වතාවේදී, තමා මුසාවාදීන්ගෙන් කෙනෙකු නම් අල්ලාහ්ගේ ශාපය තමා මත අත් වේවා (යැයි පැවසිය යුතුය).

وَيَدْرَؤُا عَنْهَا الْعَذَابَ اَنْ تَشْهَدَ اَرْبَعَ شَهٰدٰتٍۭ بِاللّٰهِ ۙ اِنَّهٗ لَمِنَ الْكٰذِبِيْنَ ۙ﴿٩﴾

9. නමුත් ඇය සිව් වතාවක් අල්ලාහ්ගේ නාමයෙන් දිවුරා නියතවශයෙන්ම ඔහු මුසාවාදීන්ගෙන් කෙනෙකු යැයි සාක්ෂි දෙන්නේ නම් ඇයගෙන් දඬුවම ඉවත් වනු ඇත.

وَالْخَامِسَةَ اَنَّ غَضَبَ اللّٰهِ عَلَيْهَآ اِنْ كَانَ مِنَ الصّٰدِقِيْنَ ﴿١٠﴾

10. තවද (ඇගේ) පස්වැනි වතාවේදී, ඔහු සත්‍යය පවසන්නන්ගෙන් කෙනෙකු නම් අල්ලාහ්ගේ මහත් කෝපය තමා මත අත් වේවා (යැයි පැවසිය යුතුය).

وَلَوْلَا فَضْلُ اللّٰهِ عَلَيْكُمْ وَرَحْمَتُهٗ وَاَنَّ اللّٰهَ تَوَّابٌ حَكِيْمٌ ﴿١١﴾

11. තවද නුඹලා කෙරෙහි වූ අල්ලාහ්ගේ වරප්‍රසාදයත් ඔහුගේ දයාලුභාවයත් නොවන්නට, තවද අල්ලාහ් පශ්චාත්තාප භාරගන්නා හා ප්‍රඥාසම්පන්න නොවන්නට, (නුඹලා විනාශ වන්නට තිබුණි).

اِنَّ الَّذِيْنَ جَآءُوْ بِالْاِفْكِ عُصْبَةٌ

12. නියතවශයෙන්ම බොරු

مِّنكُمْ ۚ لَا تَحْسَبُوهُ شَرًّا لَّكُم ۖ بَلْ هُوَ خَيْرٌ لَّكُمْ ۚ لِكُلِّ امْرِئٍ مِّنْهُم مَّا اكْتَسَبَ مِنَ الْإِثْمِ ۚ وَالَّذِي تَوَلَّىٰ كِبْرَهُ مِنْهُمْ لَهُ عَذَابٌ عَظِيمٌ ﴿١٢﴾

චෝදනාව ගෙනැවිත් ඇත්තේ නුඹලා අතරින් එක් පිරිසකි. එය නුඹලාට අයහපතක් යැයි නොසිතනු. නොඑසේය, එය නුඹලාට යහපතක්ය. ඔවුන්ගෙන් සෑම කෙනෙකුටම ඔවුන් පාපයෙන් උපයාගත් දේම ලැබෙනු ඇත. තවද ඔවුන්ගෙන් එහි විශාල වගයෙන් වගකියන්නාට වේදනීය දඬුවමක් ලැබෙනු ඇත.

لَّوْلَا إِذْ سَمِعْتُمُوهُ ظَنَّ الْمُؤْمِنُونَ وَالْمُؤْمِنَاتُ بِأَنفُسِهِمْ خَيْرًا وَقَالُوا هَٰذَا إِفْكٌ مُّبِينٌ ﴿١٣﴾

13. නුඹලා එයට සවන් දුන් විට, විශ්වාසිත පිරිමින්ද විශ්වාසිත ස්ත්‍රීන්ද තමන්ගේ ජනතාව පිළිබඳව යහපත් සිතුවිල්ලක් ඇති කරගෙන 'මෙය ප්‍රකට බොරුවක්යැ'යි නොකීවේ මන්ද?

لَّوْلَا جَاءُوا عَلَيْهِ بِأَرْبَعَةِ شُهَدَاءَ ۚ فَإِذْ لَمْ يَأْتُوا بِالشُّهَدَاءِ فَأُولَٰئِكَ عِندَ اللَّهِ هُمُ الْكَاذِبُونَ ﴿١٤﴾

14. ඔවුන් එය (ඔප්පු කිරීම) සඳහා සාක්ෂිකරුවන් සතරක් නොගෙන ආවේ මන්ද? ඔවුන් (අවශ්‍ය) සාක්ෂිකරුවන් නොගෙනා බැවින් ඇත්තෙන්ම අල්ලාහ්ගේ දැක්මෙහි ඔවුන් මුසාවාදීන්මය.

وَلَوْلَا فَضْلُ اللَّهِ عَلَيْكُمْ وَرَحْمَتُهُ فِي الدُّنْيَا وَالْآخِرَةِ لَمَسَّكُمْ فِي مَا أَفَضْتُمْ فِيهِ عَذَابٌ عَظِيمٌ ﴿١٥﴾

15. තවද නුඹලා කෙරෙහි වූ අල්ලාහ්ගේ වරප්‍රසාදයත් ඔහුගේ දයාලුභාවයත් මෙලොවෙහිදීද පරලොවෙහිදීද නොවන්නට, නුඹලා ගිලිහී සිටි එම (අපවාද) ක්‍රියාව හේතුවෙන් මහත් වූ දඬුවමක් නුඹලාට අත් වන්නට තිබිණි.

إِذْ تَلَقَّوْنَهُ بِأَلْسِنَتِكُمْ وَتَقُولُونَ بِأَفْوَاهِكُم مَّا لَيْسَ لَكُم بِهِ عِلْمٌ وَتَحْسَبُونَهُ هَيِّنًا وَهُوَ عِندَ اللَّهِ عَظِيمٌ ﴿١٦﴾

16. එවිට නුඹලා එ(අපවාද)ය තමන්ගේ දිව් වලින් සාදා ගෙන නුඹලාට ඒ ගැන කිසිදු දැනුමක් නොමැතිව නුඹලාගේ මුවින් දොඩවමින් තවද නුඹලා එය වැදගත්කමක් නැති දෙයක් යැයි සිතුවෙහුය. එසේ වුවත් අල්ලාහ්ගේ දැක්මෙහි එය ඉතා බරපතලය.

وَلَوْلَا إِذْ سَمِعْتُمُوهُ قُلْتُم مَّا يَكُونُ لَنَا أَن نَّتَكَلَّمَ بِهَٰذَا سُبْحَانَكَ هَٰذَا بُهْتَانٌ

17. තවද නුඹලාට එය ඇසුන කල්හි, 'එය ගැන කථා කිරීම අපට උචිත නැත. (දෙවියනි)! ඔබ සුවිශුද්ධය, මෙය බරපතල බොරු

عَظِيْمٌ ۝١٧

චෝදනාවක්යැ'යි නුඹලා නොකීවේ මන්ද?

يَعِظُكُمُ اللّٰهُ اَنْ تَعُوْدُوْا لِمِثْلِهٖۤ اَبَدًا اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ۝١٨

18. නුඹලා විශ්වාසිතයින් නම්, නුඹලා කිසිවිටෙකත් නැවතත් එය නොකරන්නට අල්ලාහ් නුඹලාට අනුශාසනා කරන්නේය.

وَيُبَيِّنُ اللّٰهُ لَكُمُ الْاٰيٰتِ ؕ وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ۝١٩

19. තවද අල්ලාහ් නුඹලාට ආඥාවන් විග්‍රහ කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

اِنَّ الَّذِيْنَ يُحِبُّوْنَ اَنْ تَشِيْعَ الْفَاحِشَةُ فِى الَّذِيْنَ اٰمَنُوْا لَهُمْ عَذَابٌ اَلِيْمٌ ۙ فِى الدُّنْيَا وَالْاٰخِرَةِ ؕ وَاللّٰهُ يَعْلَمُ وَاَنْتُمْ لَا تَعْلَمُوْنَ ۝٢٠

20. විශ්වාසිතයින් අතර දුරාචාරය පැතිරීම ප්‍රිය කරන අය වන ඔවුනට මෙලොවෙහිදීද පරලොවෙහිදීද වේදනීය දඬුවමක් ලැබෙනු ඇත. තවද අල්ලාහ් දන්නේය, තවද නුඹලා නොදන්නෙහුය.

وَلَوْلَا فَضْلُ اللّٰهِ عَلَيْكُمْ وَرَحْمَتُهٗ وَاَنَّ اللّٰهَ رَءُوْفٌ رَّحِيْمٌ ۝٢١ ع

21. තවද නුඹලා කෙරෙහි වූ අල්ලාහ්ගේ වරප්‍රසාදයත් ඔහුගේ දයාලුභාවයත් නොවන්නට, තවද අල්ලාහ් සානුකම්පිත හා පරම දයාබර නොවන්නට, (නුඹලා විනාශ වන්නට තිබුණි).

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَتَّبِعُوْا خُطُوٰتِ الشَّيْطٰنِ ؕ وَمَنْ يَّتَّبِعْ خُطُوٰتِ الشَّيْطٰنِ فَاِنَّهٗ يَاْمُرُ بِالْفَحْشَآءِ وَالْمُنْكَرِ ؕ وَلَوْلَا فَضْلُ اللّٰهِ عَلَيْكُمْ وَرَحْمَتُهٗ مَا زَكٰى مِنْكُمْ مِّنْ اَحَدٍ اَبَدًا ۙ وَّلٰكِنَّ اللّٰهَ يُزَكِّىْ مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ سَمِيْعٌ عَلِيْمٌ ۝٢٢

22. එම්බල විශ්වාසිතයිනි! ෂෛයිතාන්ගේ අඩිපාර අනුගමනය නොකරනු. තවද කවුරුන් හෝ ෂෛයිතාන්ගේ අඩිපාර අනුගමනය කරන්නේද, නියතවශයෙන්ම ඔහු දුරාචාරයද ප්‍රකට පිළිකුලද අණ දෙන්නේය(යැයි දැනගනු). තවද නුඹලා කෙරෙහි වූ අල්ලාහ්ගේ වරප්‍රසාදයත් ඔහුගේ දයාලුභාවයත් නොවන්නට, නුඹලාගෙන් කිසිවෙක් කිසිවිටෙකත් පවිත්‍ර නොවන්නේය. නමුත් අල්ලාහ්, ඔහු අභිමත අයව පවිත්‍ර කරන්නේය. තවද අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

وَلَا يَاْتَلِ اُولُوا الْفَضْلِ مِنْكُمْ وَالسَّعَةِ

23. නුඹලා අතරින් වරප්‍රසාද හා

أَنْ يُؤْتُوٓا أُولِى الْقُرْبٰى وَالْمَسٰكِينَ وَالْمُهٰجِرِينَ فِى سَبِيلِ اللّٰهِ ۖ وَلْيَعْفُوا وَلْيَصْفَحُوٓا ۗ أَلَا تُحِبُّونَ أَنْ يَغْفِرَ اللّٰهُ لَكُمْ ۗ وَاللّٰهُ غَفُورٌ رَّحِيمٌ ﴿٢٢﴾

ධනය හිමි අය තම නෑසියන්ටද අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්ටද අල්ලාහ්ගේ මාර්ගයෙහි තමන්ගේ නිවැස් අත්හැර යන්නන්ටද (කිසිවක්) නොදී සිටීමට දිවුරුම් නොකරත්වා! තවද ඔවුන් සමාව දී ඉවසා සිටිත්වා. අල්ලාහ් නුඹලාට ක්ෂමාව දිය යුතුයැයි නුඹලා ප්‍රිය නොකරන්නෙහුද? තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

إِنَّ الَّذِينَ يَرْمُونَ الْمُحْصَنٰتِ الْغٰفِلٰتِ الْمُؤْمِنٰتِ لُعِنُوا فِى الدُّنْيَا وَالْءَاخِرَةِ ۖ وَلَهُمْ عَذَابٌ عَظِيمٌ ﴿٢٣﴾

24. ඇත්තෙන්ම පතිවත රකින දැනුම් තේරුම් නොමැති විශ්වාසිත ස්ත්‍රීන්ට චෝදනා නගන අය මෙලොවෙහිදීද පරලොවෙහිදීද ශාප ලද්දන්ය. තවද ඔවුන්ට බරපතල දඬුවමක් ඇත.

يَوْمَ تَشْهَدُ عَلَيْهِمْ أَلْسِنَتُهُمْ وَأَيْدِيهِمْ وَأَرْجُلُهُمْ بِمَا كَانُوا يَعْمَلُونَ ﴿٢٤﴾

25. එදින ඔවුන් කරමින් සිටි දේ පිළිබඳව ඔවුන්ගේ දිවිද ඔවුන්ගේ අත්ද ඔවුන්ගේ පාදයන්ද ඔවුන්ට එරෙහිව සාක්ෂි දරනු ඇත.

يَوْمَئِذٍ يُوَفِّيهِمُ اللّٰهُ دِينَهُمُ الْحَقَّ وَيَعْلَمُونَ أَنَّ اللّٰهَ هُوَ الْحَقُّ الْمُبِينُ ﴿٢٥﴾

26. එදින අල්ලාහ් ඔවුනට ලැබිය යුතු ඔවුන්ගේ නියම ඵලවිපාකය සම්පූර්ණයෙන්ම දෙන්නේය. තවද ප්‍රකට වූ පරම සත්‍යවාදී අල්ලාහ් පමණක් බව ඔවුන් දැනගන්නෝය.

الْخَبِيثٰتُ لِلْخَبِيثِينَ وَالْخَبِيثُونَ لِلْخَبِيثٰتِ ۖ وَالطَّيِّبٰتُ لِلطَّيِّبِينَ وَالطَّيِّبُونَ لِلطَّيِّبٰتِ ۚ أُولٰٓئِكَ مُبَرَّءُونَ مِمَّا يَقُولُونَ ۖ لَهُمْ

*27. නරක දේ නරක පුරුෂයින් සඳහා වේ. තවද නරක පුරුෂයින් නරක දේ සඳහා වේ. තවද හොඳ දේ හොඳ පුරුෂයින් සඳහා වේ. තවද හොඳ පුරුෂයින් හොඳ දේ සඳහා වේ. ඔවුන් (සතුරන්) දෝෂාරෝපණය කරන දෙයින් මොවුන් සියල්ල නිදොස්ය. මොවුනට ක්ෂමාවද

*සටහන. 27: පොදුවේ කුර්ආන් විවරණය කරන්නන් මෙම වගන්තියට නරක පුරුෂයින් නරක ස්ත්‍රීන්ටද නරක ස්ත්‍රීන් නරක පුරුෂයින්ට යැයි අර්තකථනය කරති. නමුත් මෙය නිවැරදි නැත. අරාබි ව්‍යාකරණයේ දේවල් සහ ක්‍රියාවන් ස්ත්‍රී ලිංග පදයෙහි භාවිතා වේ. මෙහි සඳහන් වී ඇත්තේ ඒ ගැනමය. නැතහොත් නරක ස්ත්‍රියක් හොඳ ගති පැවතුම් ඇති පිරිමියෙකු සමග රැවටීමේ අදහසින් විවාහ වුවහොත් එම පිරිමියාගේ වරද කුමක්ද? මෙලෙසම අනෙක් පසෙටද සිතන්න. කුර්ආනයේ ඉගැන්වීම වන්නේ යහපත් දෙයෙහි නිරත වන්නන්ට දෝෂාරෝපණය නොකරන්න යන්නයි. මන්දයත් යහපතෙහි නියැලෙන ස්ත්‍රීන් සහ පුරුෂයින් යහපතම කරති.

مَّغْفِرَةٌ وَّرِزْقٌ كَرِيمٌ ﴿٢٧﴾

ගෞරවාන්විත ජීවනෝපායද ඇත.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ لَا تَدْخُلُوا۟ بُيُوتًا غَيْرَ بُيُوتِكُمْ حَتَّىٰ تَسْتَأْنِسُوا۟ وَتُسَلِّمُوا۟ عَلَىٰٓ أَهْلِهَا ۚ ذَٰلِكُمْ خَيْرٌ لَّكُمْ لَعَلَّكُمْ تَذَكَّرُونَ ﴿٢٨﴾

28. එම්බල විශ්වාසිතයිනි! නුඹලා තමන්ගේ නිවෙස් හැර අන් නිවෙස්වලට, අවසර ලබා එහි වැසියන්ට සාමය යැයි පවසන තුරු ඇතුළු නොවනු. නුඹලා අවධානයට ගනු පිණිස එය නුඹලාට යහපත වේ.

فَإِن لَّمْ تَجِدُوا۟ فِيهَآ أَحَدًا فَلَا تَدْخُلُوهَا حَتَّىٰ يُؤْذَنَ لَكُمْ ۖ وَإِن قِيلَ لَكُمُ ٱرْجِعُوا۟ فَٱرْجِعُوا۟ ۖ هُوَ أَزْكَىٰ لَكُمْ ۚ وَٱللَّهُ بِمَا تَعْمَلُونَ عَلِيمٌ ﴿٢٩﴾

29. තවද එහි නුඹලා කිසිවෙකුව නොදුටුවේ නම්, නුඹලාට අවසර ලැබෙන තුරු ඒවායෙහි ඇතුළු නොවනු. තවද 'ආපසු යනු'යි නුඹලාට පවසනු ලැබුවේ නම්, එවිට ආපසු යනු. එය නුඹලාට වඩාත් පිවිතුරුය. තවද නුඹලා කරන දේ අල්ලාහ් මැනවින් දන්නේය.

لَّيْسَ عَلَيْكُمْ جُنَاحٌ أَن تَدْخُلُوا۟ بُيُوتًا غَيْرَ مَسْكُونَةٍ فِيهَا مَتَٰعٌ لَّكُمْ ۚ وَٱللَّهُ يَعْلَمُ مَا تُبْدُونَ وَمَا تَكْتُمُونَ ﴿٣٠﴾

30. කිසිවෙකු වාසය නොකරන නුඹලාගේ වස්තූන් තිබෙන නිවෙස්වලට ඇතුළු වීම නුඹලා කෙරෙහි පවක් නොවේ. තවද නුඹලා එළි කරන දේද නුඹලා සඟවන දේද අල්ලාහ් දන්නේය.

قُل لِّلْمُؤْمِنِينَ يَغُضُّوا۟ مِنْ أَبْصَٰرِهِمْ وَيَحْفَظُوا۟ فُرُوجَهُمْ ۚ ذَٰلِكَ أَزْكَىٰ لَهُمْ ۗ إِنَّ ٱللَّهَ خَبِيرٌۢ بِمَا يَصْنَعُونَ ﴿٣١﴾

31. තමන්ගේ බැල්ම පහත හෙළන ලෙසත් තමන්ගේ රහස් අංගයන් ආරක්ෂා කරන ලෙසත් විශ්වාසිත පිරිමින්ට පවසන්න. එය ඔවුන්ට වඩාත් පිවිතුරු වේ. නියතවශයෙන්ම අල්ලාහ් ඔවුන් කරන දේ ගැන වඩාත් විමසිලිමත්ය.

وَقُل لِّلْمُؤْمِنَٰتِ يَغْضُضْنَ مِنْ أَبْصَٰرِهِنَّ وَيَحْفَظْنَ فُرُوجَهُنَّ وَلَا يُبْدِينَ زِينَتَهُنَّ إِلَّا مَا ظَهَرَ مِنْهَا ۖ وَلْيَضْرِبْنَ بِخُمُرِهِنَّ عَلَىٰ جُيُوبِهِنَّ ۖ وَلَا يُبْدِينَ

32. එමෙන්ම විශ්වාසිත ස්ත්‍රීන් හට ඔවුන්ගේ බැල්ම පහත හෙළන ලෙසත්, ඔවුන්ගේ රහස් අංග ආරක්ෂා කරන ලෙසත් ඉබේම පෙනෙන දේ හැරෙන්නට ඔවුන්ගේ අලංකාර සහ සැරසිලි නොපෙන්වන ලෙසත් ඔවුන්ගේ හිස් වැසුම් ඔවුන්ගේ ළය පෙදෙස ආවරණය වන

පරිදි ඔවුන් දැමිය යුතු ලෙසත් පවසන්න. තවද ඔවුන් තමන්ගේ අලංකාර සහ එහි සැරසිලි ඔවුන්ගේ සැමියන්ට හෝ ඔවුන්ගේ පියවරුන්ට හෝ ඔවුන්ගේ සැමියන්ගේ පියවරුන්ට හෝ ඔවුන්ගේ පුතුන්ට හෝ ඔවුන්ගේ සැමියන්ගේ පුතුන්ට හෝ ඔවුන්ගේ සොහොයුරන්ට හෝ ඔවුන්ගේ සොහොයුරන්ගේ පුතුන්ට හෝ ඔවුන්ගේ සොහොයුරියන්ගේ පුතුන්ට හෝ ඔවුන්ගේ (සමකාලීන) ස්ත්‍රීන්ට හෝ ඔවුන්ගේ දකුණු අත් හිමිකර ගත් අයට හෝ තමන් තුළ ලිංගික ආශාවක් නොමැති පිරිමි සේවකයින්ට හෝ ස්ත්‍රීන්ගේ රහස් අංගයන් ගැන අවබෝධයක් නැති කුඩා ළමුන්ට හෝ හැර අන් අයට නොපෙන්විය යුතුය. තවද ඔවුන්ගේ සැඟවුනු අලංකාරය ප්‍රසිද්ධියේ පෙනෙන විලාසයෙන් ඔවුන්ගේ පාදයන් (පොළොවේ) ගසා නොඇවිදිය යුතුය. තවද එම්බල විශ්වාසිතයිනි! නුඹලා ජයග්‍රහණය වනු පිණිස, නුඹලා සියල්ල අල්ලාහ් වෙතට හැරෙනු.

زِينَتَهُنَّ إِلَّا لِبُعُولَتِهِنَّ أَوْ آبَائِهِنَّ
أَوْ آبَاءِ بُعُولَتِهِنَّ أَوْ أَبْنَائِهِنَّ أَوْ أَبْنَاءِ
بُعُولَتِهِنَّ أَوْ إِخْوَانِهِنَّ أَوْ بَنِي إِخْوَانِهِنَّ
أَوْ بَنِي أَخَوَاتِهِنَّ أَوْ نِسَائِهِنَّ أَوْ مَا مَلَكَتْ
أَيْمَانُهُنَّ أَوِ التَّابِعِينَ غَيْرِ أُولِي الْإِرْبَةِ
مِنَ الرِّجَالِ أَوِ الطِّفْلِ الَّذِينَ لَمْ
يَظْهَرُوا عَلَىٰ عَوْرَاتِ النِّسَاءِ ۖ وَلَا
يَضْرِبْنَ بِأَرْجُلِهِنَّ لِيُعْلَمَ مَا يُخْفِينَ
مِنْ زِينَتِهِنَّ ۚ وَتُوبُوا إِلَى اللَّهِ جَمِيعًا
أَيُّهَ الْمُؤْمِنُونَ لَعَلَّكُمْ تُفْلِحُونَ ﴿٣٢﴾

33. තවද නුඹලා අතර සිටින වැන්දඹුවන්වද, (විවාහයට) සුදුසු අයවන නුඹලාගේ වහලුන්වද වහලියන්වද විවාහ කරදෙනු. ඔවුන් දිළිඳුන් නම්, අල්ලාහ් ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුනට වත්කම් සපුරන්නේය. තවද අල්ලාහ් සර්ව ව්‍යාපකයාය, සියල්ල දත්තාය.

وَأَنْكِحُوا الْأَيَامَىٰ مِنْكُمْ وَالصَّالِحِينَ مِنْ
عِبَادِكُمْ وَإِمَائِكُمْ ۚ إِنْ يَكُونُوا
فُقَرَاءَ يُغْنِهِمُ اللَّهُ مِنْ فَضْلِهِ ۗ وَاللَّهُ
وَاسِعٌ عَلِيمٌ ﴿٣٣﴾

34. තවද විවාහයට (වත්කමක්) නොමැති අය, අල්ලාහ් ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුනට වත්කම් සපුරන තුරු ඔවුන් පතිවත රැකගත යුතුය. තවද නුඹලාගේ වහලුන්ගෙන් නිදහස් වීමේ ලියවිල්ලේ බැඳීම මත කැමති වන අය, ඔවුන් තුළ නුඹලා යම් යහපතක් දකින්නේ නම් එය ඔවුන්ට ලියා දෙනු. තවද අල්ලාහ්ගේ වස්තුවෙන් නුඹලාට පිරිනමා ඇති දෙයින් ඔවුනට දෙනු. තවද

وَلْيَسْتَعْفِفِ الَّذِينَ لَا يَجِدُونَ نِكَاحًا
حَتَّىٰ يُغْنِيَهُمُ اللَّهُ مِنْ فَضْلِهِ ۗ وَالَّذِينَ
يَبْتَغُونَ الْكِتَابَ مِمَّا مَلَكَتْ أَيْمَانُكُمْ
فَكَاتِبُوهُمْ إِنْ عَلِمْتُمْ فِيهِمْ خَيْرًا ۖ
وَآتُوهُمْ مِنْ مَالِ اللَّهِ الَّذِي آتَاكُمْ ۚ

وَلَا تُكْرِهُوْا فَتَيٰتِكُمْ عَلَى الْبِغَآءِ اِنْ اَرَدْنَ تَحَصُّنًا لِّتَبْتَغُوْا عَرَضَ الْحَيٰوةِ الدُّنْيَا ؕ وَمَنْ يُّكْرِهْهُّنَّ فَاِنَّ اللّٰهَ مِنْۢ بَعْدِ اِكْرَاهِهِنَّ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٣٤﴾

නුඹලාගේ වහලියන් පතිවත රැකීමට කැමතිවන්නේ නම් නුඹලා මෙලොව ජීවිතයේ ප්‍රයෝජනය ගනු පිණිස (ඔවුන්ව අවිවාහකව තබාගෙන) දුරාචාර ජීවිතයට බල නොකරනු. නමුත් කිසිවෙකු ඔවුන්ට බල කරන්නේ නම් ඔවුන්ගේ බලහත්කාරයෙන් පසුව අල්ලාහ් (වහලියන්ට) අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَلَقَدْ اَنْزَلْنَاۤ اِلَيْكُمْ اٰيٰتٍ مُّبَيِّنٰتٍ وَّمَثَلًا مِّنَ الَّذِيْنَ خَلَوْا مِنْ قَبْلِكُمْ وَمَوْعِظَةً لِّلْمُتَّقِيْنَ ﴿٣٥﴾

35. තවද අපි නුඹලාට ප්‍රත්‍යක්ෂ සළකුණුද නුඹලාට පෙර ඉකුත් වූ අයගේ ආදර්ශයද දෙවියන් කෙරෙහි බිය ඇත්තවුන් හට දැනමුතුකමක්ද පහළ කළෙමු.

اَللّٰهُ نُوْرُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ مَثَلُ نُوْرِهٖ كَمِشْكٰوةٍ فِيْهَا مِصْبَاحٌ ؕ اَلْمِصْبَاحُ فِىْ زُجَاجَةٍ ؕ اَلزُّجَاجَةُ كَاَنَّهَا كَوْكَبٌ دُرِّىٌّ يُّوْقَدُ مِنْ شَجَرَةٍ مُّبٰرَكَةٍ زَيْتُوْنَةٍ لَّا شَرْقِيَّةٍ وَّلَا غَرْبِيَّةٍ ۙ يَّكَادُ زَيْتُهَا يُضِىْٓءُ وَلَوْ لَمْ تَمْسَسْهُ نَارٌ ؕ نُوْرٌ عَلٰى نُوْرٍ ؕ يَهْدِى اللّٰهُ لِنُوْرِهٖ مَنْ يَّشَآءُ ؕ وَيَضْرِبُ اللّٰهُ الْاَمْثَالَ لِلنَّاسِ ؕ وَاللّٰهُ بِكُلِّ شَىْءٍ عَلِيْمٌ ﴿٣٦﴾

36. අල්ලාහ් අහස්හිද පොළොවෙහිද ආලෝකය වේ. ඔහුගේ ආලෝකයේ උපමාව (දීප්තිමත්) විමිනියක් බඳුය, එහි පහනකි, එම පහන පළිඟුවක් තුළය. එම පළිඟුව බැබලෙන තරුවක් මෙන්ය. (එම පහන) පෙරදිගත් අපරදිගත් නොවන, ආශිර්වාද ලත් ඔලිව් ගසකින් ආලෝකමත් කර ඇත. එහි තෙල, ගින්න එය ස්පර්ශ නොකළද ඇවිලි ආලෝකමත් වන සුළුය. ආලෝකය මත ආලෝකයකි! අල්ලාහ්, ඔහු අභිමත අයට ඔහුගේ ආලෝකය වෙත මග පෙන්වන්නේය. තවද, අල්ලාහ් මිනිසුන්ට උපමාවන් ගෙන හැර දක්වන්නේය. තවද අල්ලාහ් සියලු දේ මැනැවින් දන්නාය.

فِىْ بُيُوْتٍ اَذِنَ اللّٰهُ اَنْ تُرْفَعَ وَيُذْكَرَ فِيْهَا اسْمُهٗ ۙ يُسَبِّحُ لَهٗ فِيْهَا بِالْغُدُوِّ وَالْاٰصَالِ ﴿٣٧﴾

37. කුමන නිවෙස් උසස් තත්ත්වයට පත් විය යුතු යැයිද ඒවායෙහි ඔහුගේ නාමය සිහි කරනු ලැබිය යුතු යැයිද අල්ලාහ් නියම කරන්නේද, ඒවායෙහි (එම පහන) ඇත. ඒවායෙහි උදේ සහ සවස් කාලයන්හිද ඔහුව සුවිශුද්ධ කරති.

38. එවන් පුරුෂයින්ය, අල්ලාහ්ව සිහිකිරීමෙන්ද නමස්කාරයෙහි නිරතවීමෙන්ද zසකාත්(දුගී බද්ද) ගෙවීමෙන්ද වෙළඳාම හෝ ගනුදෙනුව ඔවුන්ව නොවළක්වයි. හදවත් සහ ඇස් කලබලයට පත් වන්නාවූ එම දිනයට ඔවුහු බිය වන්නෝය.

رِجَالٌ لَّا تُلْهِيهِمْ تِجَارَةٌ وَلَا بَيْعٌ عَن
ذِكْرِ اللَّهِ وَإِقَامِ الصَّلَوٰةِ وَإِيتَآءِ الزَّكَوٰةِ ۙ
يَخَافُونَ يَوْمًا تَتَقَلَّبُ فِيهِ الْقُلُوبُ
وَالْأَبْصَارُ ﴿٣٨﴾

39. එයට හේතුව ඔවුන්ගේ ක්‍රියාවන්හි විශිෂ්ඨ තිළිණය අල්ලාහ් ඔවුනට දෙනු පිණිසද, ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුනට වර්ධනය කර දෙනු පිණිසද වේ. තවද අල්ලාහ් ඔහු අභිමත අයට අප්‍රමාණව ජීවනෝපාය ලබා දෙන්නේය.

لِيَجْزِيَهُمُ اللَّهُ أَحْسَنَ مَا عَمِلُوا
وَيَزِيدَهُم مِّن فَضْلِهِ ۗ وَاللَّهُ يَرْزُقُ
مَن يَشَآءُ بِغَيْرِ حِسَابٍ ﴿٣٩﴾

40. එමෙන්ම අවිශ්වාස කරන අය ගත්කළ, ඔවුන්ගේ ක්‍රියාවන් කාන්තාරයක මිරිඟුවක් බඳුය, පිපාසිත කෙනෙකු එය ජලය යැයි සිතා ඒ වෙතට පැමිණි කල්හි එහි කිසිවක් ඔහුට නොලැබෙනු ඇත. තවද එහිදී ඔහු අල්ලාහ් හමුවන්නේය. පසුව ඔහුගේ ගණන් ගැනීමේ ප්‍රතිඵලය ඔහු මුළුමනින්ම දෙන්නේය. තවද අල්ලාහ් ගණන් ගැනීමෙහි ඉතා සීඝ්‍රය.

وَالَّذِينَ كَفَرُوٓا أَعْمَالُهُمْ كَسَرَابٍ
بِقِيعَةٍ يَحْسَبُهُ الظَّمْـَٔانُ مَآءً حَتَّىٰٓ إِذَا
جَآءَهُۥ لَمْ يَجِدْهُ شَيْـًٔا وَوَجَدَ اللَّهَ عِندَهُۥ
فَوَفَّىٰهُ حِسَابَهُۥ ۗ وَاللَّهُ سَرِيعُ الْحِسَابِ ﴿٤٠﴾

41. නැතහොත් (ඔවුන්ගේ ක්‍රියාවන්) ගැඹුරු මුහුදෙහි ඝණ අන්ධකාරය බඳුය. එය මත රැල්ලක් වසයි. ඒ මත තව රැල්ලකි, එයට ඉහලින් වලාකුළුය, ඒවා එකක් මත එකක් ලෙස විහිදුණු අන්ධකාරයන්ය. ඔහුගේ අත පිටතට ගත් විට ඔහුට එය නොපෙනේ. තවද අල්ලාහ් කවරෙකුට ආලෝකය නොදෙන්නේද ඔහුට ආලෝකයක් කොහෙත්ම නැත.

أَوْ كَظُلُمَٰتٍ فِى بَحْرٍ لُّجِّىٍّ يَغْشَىٰهُ مَوْجٌ
مِّن فَوْقِهِۦ مَوْجٌ مِّن فَوْقِهِۦ سَحَابٌ ۚ
ظُلُمَٰتٌۢ بَعْضُهَا فَوْقَ بَعْضٍ ۚ إِذَآ
أَخْرَجَ يَدَهُۥ لَمْ يَكَدْ يَرَىٰهَا ۗ وَمَن لَّمْ
يَجْعَلِ اللَّهُ لَهُۥ نُورًا فَمَا لَهُۥ مِن نُّورٍ ﴿٤١﴾

42. අහස්හි හා පොළොවෙහි ඇති සියල්ලන්ද (එලෙසම) තම පියාපත් විහිදුවා ඇති පක්ෂීන්ද අල්ලාහ්ටම සුවිශුද්ධ කරන බව ඔබ දැක

أَلَمْ تَرَ أَنَّ اللَّهَ يُسَبِّحُ لَهُۥ مَن فِى السَّمَٰوَٰتِ
وَالْأَرْضِ وَالطَّيْرُ صَٰٓفَّٰتٍ ۖ كُلٌّ قَدْ عَلِمَ

صَلَاتَهُ وَتَسْبِيحَهُ ۗ وَاللَّهُ عَلِيمٌ بِمَا يَفْعَلُونَ ﴿٤٢﴾

නොතිබේද? ඒ සෑම කෙනෙකුම (තම) තමන්ගේ (පිළිවෙත අනුව) නමස්කාරයද සුවිශුද්ධ කිරීමද දන්නෝය. තවද ඔවුන් කරන දේ අල්ලාහ් මැනැවින් දත්තාය.

وَلِلَّهِ مُلْكُ السَّمٰوٰتِ وَالْأَرْضِ ۖ وَإِلَى اللَّهِ الْمَصِيرُ ﴿٤٣﴾

43. තවද අහස්හිද පොළොවෙහිද රාජ්‍යය අල්ලාහ් සතුය. තවද ආපසු යෑම අල්ලාහ් වෙතටමය.

أَلَمْ تَرَ أَنَّ اللَّهَ يُزْجِي سَحَابًا ثُمَّ يُؤَلِّفُ بَيْنَهُ ثُمَّ يَجْعَلُهُ رُكَامًا فَتَرَى الْوَدْقَ يَخْرُجُ مِنْ خِلَالِهِ ۚ وَيُنَزِّلُ مِنَ السَّمَاءِ مِنْ جِبَالٍ فِيهَا مِنْ بَرَدٍ فَيُصِيبُ بِهِ مَنْ يَشَاءُ وَيَصْرِفُهُ عَنْ مَنْ يَشَاءُ ۖ يَكَادُ سَنَا بَرْقِهِ يَذْهَبُ بِالْأَبْصَارِ ﴿٤٤﴾

44. අල්ලාහ් වලාකුළු සෙමින් මෙහෙයවමින් ඒවා එකට සම්බන්ධ කරමින් ඒවා එක පිට එකක් රැස්කරන සැටි ඔබ දැක නොතිබේද? පසුව ඒ මැදින් වැහි පිටවන බව ඔබ දකින්නේය. තවද ඔහු අහසින් (වලාකුළු වැනි) කඳු පහළ කරන්නේය, එහි හිම කැට ඇත. තවද ඔහු අභිමත අයට ඔහු එය වැටෙන්නට සලස්වන්නේය. තවද ඔහු අභිමත අයගෙන් එය වළක්වන්නේය. එහි අකුණු සැර, පෙනීම පැහැරගන්නා සුලුය.

يُقَلِّبُ اللَّهُ اللَّيْلَ وَالنَّهَارَ ۚ إِنَّ فِي ذٰلِكَ لَعِبْرَةً لِأُولِي الْأَبْصَارِ ﴿٤٥﴾

45. අල්ලාහ් රාත්‍රියද දහවලද මාරුවෙන් මාරුවට ඇති කරන්නේය. නියතවශයෙන්ම නුවන ඇත්තන්ට එහි පාඩමක් ඇත.

وَاللَّهُ خَلَقَ كُلَّ دَابَّةٍ مِنْ مَاءٍ ۖ فَمِنْهُمْ مَنْ يَمْشِي عَلَىٰ بَطْنِهِ ۖ وَمِنْهُمْ مَنْ يَمْشِي عَلَىٰ رِجْلَيْنِ ۚ وَمِنْهُمْ مَنْ يَمْشِي عَلَىٰ أَرْبَعٍ ۚ يَخْلُقُ اللَّهُ مَا يَشَاءُ ۚ إِنَّ اللَّهَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٤٦﴾

46. තවද අල්ලාහ් සෑම සත්වයෙකුම ජලයෙන් මැව්වේය. ඔවුනතරින් සමහරක් බඩගාගෙන යති. තවද ඔවුනතරින් (සමහරක්) දෙපයින් ගමන් කරති. තවද ඔවුනතරින් (සමහරක්) සිවු (පාදයෙන්) ගමන් කරති. අල්ලාහ් ඔහු අභිමත දේ මවන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් ඔහු අභිමත සියළු දේ කිරීමට බලය ඇත්තාය.

لَقَدْ أَنْزَلْنَا آيَاتٍ مُبَيِّنَاتٍ ۚ وَاللَّهُ يَهْدِي

47. ඇත්තෙන්ම අපි ප්‍රත්‍යක්ෂ

مَنْ يَّشَاءُ اِلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٤٧﴾

සළකුණු පහළ කර ඇත්තෙමු. තවද අල්ලාහ්, ඔහු අභිමත අයව ඍජු මාර්ගයට යොමු කරන්නේය.

وَيَقُوْلُوْنَ اٰمَنَّا بِاللّٰهِ وَبِالرَّسُوْلِ وَاَطَعْنَا ثُمَّ يَتَوَلّٰى فَرِيْقٌ مِّنْهُمْ مِّنْۢ بَعْدِ ذٰلِكَ ؕ وَمَاۤ اُولٰٓئِكَ بِالْمُؤْمِنِيْنَ ﴿٤٨﴾

48. තවද ඔවුහු, 'අපි අල්ලාහ් කෙරෙහිද දූතයාණන් කෙරෙහිද විශ්වාස කරන්නෙමු. එමෙන්ම අපි අවනත වන්නෙමු'යි කියති. ඉන් පසුවද ඔවුන්ගෙන් සමහරු පිටුපා යති. තවද විශ්වාසිතයින් නොවන්නේ ඔවුන්මය.

وَاِذَا دُعُوْۤا اِلَى اللّٰهِ وَرَسُوْلِهٖ لِيَحْكُمَ بَيْنَهُمْ اِذَا فَرِيْقٌ مِّنْهُمْ مُّعْرِضُوْنَ ﴿٤٩﴾

49. තවද ඔවුනතර විනිශ්චය කරනු පිණිස අල්ලාහ් වෙතද ඔහුගේ දූතයාණන් වෙතද ඔවුන් කැඳවනු ලැබුවහොත්, එසැනින්ම ඔවුන්ගෙන් පිරිසක් පිටුපා යන්නෝය.

وَاِنْ يَّكُنْ لَّهُمُ الْحَقُّ يَاْتُوْۤا اِلَيْهِ مُذْعِنِيْنَ ؕ ﴿٥٠﴾

50. තවද යුක්තිය ඔවුනට (විය යුතු) යැයි (ඔවුන් සිතන්නේ) නම් ඔවුන් (මුළුමනින්ම) යටහත් වෙමින් ඔහු වෙත දිව එන්නෝය.

اَفِىْ قُلُوْبِهِمْ مَّرَضٌ اَمِ ارْتَابُوْۤا اَمْ يَخَافُوْنَ اَنْ يَّحِيْفَ اللّٰهُ عَلَيْهِمْ وَرَسُوْلُهٗ ؕ بَلْ اُولٰٓئِكَ هُمُ الظّٰلِمُوْنَ ﴿٥١﴾

51. ඔවුන්ගේ හදවත්හි රෝගයක්ද? නැතහොත් ඔවුන් සැකයෙහි පසුවන්නෝද? නැතහොත් අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් ඔවුනට අසාධාරණ කරනු ඇතැයි ඔවුන් බිය වන්නෝද? නොඑසේය, වරදකරුවන් වන්නේ ඔවුන්මය.

اِنَّمَا كَانَ قَوْلَ الْمُؤْمِنِيْنَ اِذَا دُعُوْۤا اِلَى اللّٰهِ وَرَسُوْلِهٖ لِيَحْكُمَ بَيْنَهُمْ اَنْ يَّقُوْلُوْا سَمِعْنَا وَاَطَعْنَا ؕ وَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ﴿٥٢﴾

52. විශ්වාසිතයින්ගේ ප්‍රතිචාරය වනුයේ, ඔවුනතර විනිශ්චය කරනු පිණිස ඔවුන්ව අල්ලාහ් වෙතද ඔහුගේ දූතයාණන් වෙතද කැඳවනු ලැබුවහොත්, 'අපි සවන් දුනිමු. අපි අවනත වූයෙමු'යැයි (කීම) පමණි. තවද සමෘද්ධිමත් වන්නන් ඔවුන්මය.

وَمَنْ يُّطِعِ اللّٰهَ وَرَسُوْلَهٗ وَيَخْشَ اللّٰهَ وَيَتَّقْهِ فَاُولٰٓئِكَ هُمُ الْفَآئِزُوْنَ ﴿٥٣﴾

53. තවද කවුරුන් හෝ අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද කීකරු වී අල්ලාහ්ට බිය දක්වන්නේද, තවද (ආරක්ෂාවට) ඔහුව පලිහයක් ලෙස ගන්නේද ඔවුන්ම ජයග්‍රාහකයෝය.

وَاَقْسَمُوْا بِاللّٰهِ جَهْدَ اَيْمَانِهِمْ لَئِنْ اَمَرْتَهُمْ لَيَخْرُجُنَّ ؕ قُلْ لَّا تُقْسِمُوْا ۚ طَاعَةٌ مَّعْرُوْفَةٌ ؕ اِنَّ اللّٰهَ خَبِيْرٌۢ بِمَا تَعْمَلُوْنَ ﴿٥٤﴾

54. තවද ඔබ ඔවුනට අණ කළේ නම් ඔවුන් නියතවශයෙන්ම (නිවෙස් වලින්) පිටත් වන බවට ඔවුන් තමන්ගේ දැඩි දිවුරුම් වලින් අල්ලාහ්ගේ නාමයෙන් දිවුරති. පවසන්න, 'දිවුරුම් නොදෙනු. (අවශ්‍ය වනුයේ) සැබෑ අවනතභාවයයි. නියතවශයෙන්ම නුඹලා කරන දේ ගැන අල්ලාහ් ඉතා විමසිලිමත්ය'.

قُلْ اَطِيْعُوا اللّٰهَ وَاَطِيْعُوا الرَّسُوْلَ ۚ فَاِنْ تَوَلَّوْا فَاِنَّمَا عَلَيْهِ مَا حُمِّلَ وَعَلَيْكُمْ مَّا حُمِّلْتُمْ ؕ وَاِنْ تُطِيْعُوْهُ تَهْتَدُوْا ؕ وَمَا عَلَى الرَّسُوْلِ اِلَّا الْبَلٰغُ الْمُبِيْنُ ﴿٥٥﴾

55. 'අල්ලාහ්ට අවනත වනු. තවද දූතයාණන්ටද අවනත වනු'යි පවසන්න. තවද නුඹලා පිටුපෑවහොත්, (කවුරුන් හෝ එසේ කරන්නේද) ඔහු(දූතයා) කෙරෙහි වගකීම් පවරන ලද දෙයට ඔහු වග කිව යුතු වන්නේය. එලෙසම නුඹලා කෙරෙහි වගකීම් පවරන ලද දෙයට නුඹලා වගකිව යුතු වන්නෙහුය. තවද නුඹලා ඔහුට අවනත වුයේ නම්, නුඹලා යහමග ලබන්නෙහුය. තවද දූතයාණන්ගේ වගකීම පණිවිඩය පැහැදිලිව දන්වා සිටීම මිස නැත.

وَعَدَ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا مِنْكُمْ وَعَمِلُوا الصّٰلِحٰتِ لَيَسْتَخْلِفَنَّهُمْ فِى الْاَرْضِ كَمَا اسْتَخْلَفَ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ ۖ وَلَيُمَكِّنَنَّ لَهُمْ دِيْنَهُمُ الَّذِى ارْتَضٰى لَهُمْ وَلَيُبَدِّلَنَّهُمْ مِّنْۢ بَعْدِ خَوْفِهِمْ اَمْنًا ؕ يَعْبُدُوْنَنِىْ لَا يُشْرِكُوْنَ بِىْ شَيْـًٔا ؕ وَمَنْ كَفَرَ بَعْدَ ذٰلِكَ فَاُولٰٓئِكَ هُمُ الْفٰسِقُوْنَ ﴿٥٦﴾

56. අල්ලාහ්, නුඹලා අතරින් විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන්නන් හට, ඔවුන්ට පෙර සිටි අයගෙන් ඔහු කලීෆාවරුන් කළාක් මෙන් ඔවුන්වද ඔහු නියතවශයෙන්ම පොළොවෙහි කලීෆාවරුන් කරන්නේයැයිද ඔහු ඔවුන් වෙනුවෙන් තෝරාගෙන ඇති ඔවුන්ගේ ධර්මය ඔහු නියතවශයෙන්ම ඔවුනට ස්ථාපිත කර දෙන්නේයැයිද නියතවශයෙන්ම ඔහු ඔවුන්ගේ භීතියට පසු ඒ වෙනුවට ඔවුනට ආරක්ෂාවත් (සාමයත්) සලසා දෙන්නේයැයිද පොරොන්දු වී ඇත. ඔවුන් මා නමදිනු ඇත. තවද ඔවුන් මා සමග කිසිවක් සමාන නොකරනු ඇත. ඉන්පසුවත් කවුරුන් හෝ අකෘතඥවන්නේද ඔවුන්ම කැරලිකරුවන් වන්නෝය.

وَاَقِيْمُوا الصَّلٰوةَ وَاٰتُوا الزَّكٰوةَ وَاَطِيْعُوا الرَّسُوْلَ لَعَلَّكُمْ تُرْحَمُوْنَ ﴿٥٧﴾

57. තවද නුඹලාට දයාව දක්වනු ලබනු පිණිස, නැමදුම් ඉටු කරනු. තවද zසකාත්(දුගී බද්ද) දෙනු. තවද මෙම දූතයාණන්ට අවනත වනු.

لَا تَحْسَبَنَّ الَّذِينَ كَفَرُوا مُعْجِزِينَ فِي الْأَرْضِ ۚ وَمَأْوَاهُمُ النَّارُ ۖ وَلَبِئْسَ الْمَصِيرُ ٥٨

58. අවිශ්වාස කළ අයට පොළොවෙහි (අපගේ සැලැස්ම) නිෂ්ඵල කළ හැකි යැයි නොසිතන්න. ඔවුන්ගේ වාසස්ථානය නිරය වේ. තවද එය ඇත්තෙන්ම නපුරු වාසස්ථානයකි.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لِيَسْتَأْذِنكُمُ الَّذِينَ مَلَكَتْ أَيْمَانُكُمْ وَالَّذِينَ لَمْ يَبْلُغُوا الْحُلُمَ مِنكُمْ ثَلَاثَ مَرَّاتٍ ۚ مِّن قَبْلِ صَلَاةِ الْفَجْرِ وَحِينَ تَضَعُونَ ثِيَابَكُم مِّنَ الظَّهِيرَةِ وَمِن بَعْدِ صَلَاةِ الْعِشَاءِ ۚ ثَلَاثُ عَوْرَاتٍ لَّكُمْ ۚ لَيْسَ عَلَيْكُمْ وَلَا عَلَيْهِمْ جُنَاحٌ بَعْدَهُنَّ ۚ طَوَّافُونَ عَلَيْكُم بَعْضُكُمْ عَلَىٰ بَعْضٍ ۚ كَذَٰلِكَ يُبَيِّنُ اللَّهُ لَكُمُ الْآيَاتِ ۗ وَاللَّهُ عَلِيمٌ حَكِيمٌ ٥٩

59. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේ දකුණු අත් හිමි කරගත් අයත් නුඹලාගෙන් වැඩිවියට නොඑළැඹූ අයත් (නුඹලා වෙත පැමිණීමට පෙර) තුන් වේලාවන්හි නුඹලාගෙන් අවසර පැතිය යුතුය. එනම් අලුයම නමස්කාරයට පෙරද මධ්‍යහ්නයේ නුඹලාගේ (අමතර) වස්ත්‍රයන් පසෙකට තබා සිටින විටද රාත්‍රි නමස්කාරයට පසුවද වේ. (මේවා) නුඹලාගේ පෞද්ගලික වේලාවන් තුන වේ. මේ හැර අනෙක් (වේලාවන්)හි නුඹලා කෙරෙහිද ඔවුන් කෙරෙහිද වරදක් නැත. මන්ද නුඹලාගෙන් ඇතැම් අය ඇතැම් අයව වරින් වර හමුවන නිසාය. මෙලෙස අල්ලාහ් නුඹලාට සළකුණු පැහැදිලි කරයි. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

وَإِذَا بَلَغَ الْأَطْفَالُ مِنكُمُ الْحُلُمَ فَلْيَسْتَأْذِنُوا كَمَا اسْتَأْذَنَ الَّذِينَ مِن قَبْلِهِمْ ۚ كَذَٰلِكَ يُبَيِّنُ اللَّهُ لَكُمْ آيَاتِهِ ۗ وَاللَّهُ عَلِيمٌ حَكِيمٌ ٦٠

60. තවද නුඹලාගේ දරුවන් වැඩිවියට එළැඹූ විට, ඔවුන්ද ඔවුන්ට පෙර (සඳහන් වූ) අය අවසර ලබාගත් පරිදිම අවසර ලබා ගත යුතුය. මෙලෙස අල්ලාහ් ඔහුගේ විධානයන් නුඹලාට පැහැදිලි කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

وَالْقَوَاعِدُ مِنَ النِّسَاءِ اللَّاتِي لَا يَرْجُونَ نِكَاحًا فَلَيْسَ عَلَيْهِنَّ جُنَاحٌ أَن يَضَعْنَ ثِيَابَهُنَّ غَيْرَ مُتَبَرِّجَاتٍ بِزِينَةٍ ۖ وَأَن

61. විවාහ අවධිය පසුකළ මැදිවිය ඉක්මවූ ස්ත්‍රීන් ගත්කළ, ඔවුන් තමන්ගේ රූපශ්‍රීය උවමනාවෙන් ප්‍රදර්ශණය කිරීමේ අදහසින් තොරව තම අමතර වස්ත්‍රයන් පසෙකට තැබීම ඔවුන් කෙරෙහි වරදක් නැත.

يَّسْتَعْفِفْنَ خَيْرٌ لَّهُنَّ ۗ وَاللّٰهُ سَمِيْعٌ عَلِيْمٌ ﴿٦١﴾

තවද, ඔවුන් (ඔවුන්ගේ පවිත්‍රත්වය) සුරැකීමට මීටත් වඩා පරෙස්සම් වන්නේ නම් එය ඔවුනට වඩා යහපත්ය. තවද අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

لَيْسَ عَلَى الْاَعْمٰى حَرَجٌ وَّلَا عَلَى الْاَعْرَجِ حَرَجٌ وَّلَا عَلَى الْمَرِيْضِ حَرَجٌ وَّلَا عَلٰٓى اَنْفُسِكُمْ اَنْ تَاْكُلُوْا مِنْۢ بُيُوْتِكُمْ اَوْ بُيُوْتِ اٰبَآئِكُمْ اَوْ بُيُوْتِ اُمَّهٰتِكُمْ اَوْ بُيُوْتِ اِخْوَانِكُمْ اَوْ بُيُوْتِ اَخَوٰتِكُمْ اَوْ بُيُوْتِ اَعْمَامِكُمْ اَوْ بُيُوْتِ عَمّٰتِكُمْ اَوْ بُيُوْتِ اَخْوَالِكُمْ اَوْ بُيُوْتِ خٰلٰتِكُمْ اَوْ مَا مَلَكْتُمْ مَّفَاتِحَهٗۤ اَوْ صَدِيْقِكُمْ ۗ لَيْسَ عَلَيْكُمْ جُنَاحٌ اَنْ تَاْكُلُوْا جَمِيْعًا اَوْ اَشْتَاتًا ۗ فَاِذَا دَخَلْتُمْ بُيُوْتًا فَسَلِّمُوْا عَلٰٓى اَنْفُسِكُمْ تَحِيَّةً مِّنْ عِنْدِ اللّٰهِ مُبٰرَكَةً طَيِّبَةً ۗ كَذٰلِكَ يُبَيِّنُ اللّٰهُ لَكُمُ الْاٰيٰتِ لَعَلَّكُمْ تَعْقِلُوْنَ ﴿٦٢﴾

62. නුඹලාගේ නිවෙස්වල හෝ නුඹලාගේ පියවරුන්ගේ නිවෙස්වල හෝ එසේම නුඹලාගේ මව්වරුන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ සහෝදරවරුන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ සහෝදරියන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ පියවරුන්ගේ සහෝදරයන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ පියවරුන්ගේ සහෝදරියන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ මව්වරුන්ගේ සහෝදරයන්ගේ නිවෙස්වල හෝ නුඹලාගේ මව්වරුන්ගේ සහෝදරියන්ගේ නිවෙස්වල හෝ යතුරු නුඹලා සතුව ඇති (නිවෙස්වල) හෝ නුඹලාගේ මිතුරන්ගේ නිවෙස්වල හෝ ආහාර අනුභව කිරීම අන්ධ අයටද වරදක් නැත. අබ්බාගාත අයටද වරදක් නැත. රෝගී අයටද වරදක් නැත. නුඹලාටද (වරදක්) නැත. නුඹලා එකට එකතු වී හෝ වෙන වෙනම හෝ ආහාර අනුභව කිරීම නුඹලා කෙරෙහි වරදක් නැත. නමුත් නුඹලා නිවෙස් වලට පිවිසෙන විට නුඹලාගේ මිනිසුනට සාමයේ ආචාර කරනු. එය නුඹලාගේ අධිපතියාණන් වෙතින් වන ආශිර්වාදයෙන් පිරුණු සහ පවිත්‍රවූ සුබපැතුමකි. මෙලෙස අල්ලාහ් නුඹලා වටහාගනු පිණිස විධානයන් නුඹලාට පැහැදිලි කරන්නේය.

اِنَّمَا الْمُؤْمِنُوْنَ الَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ وَرَسُوْلِهٖ وَاِذَا كَانُوْا مَعَهٗ عَلٰٓى اَمْرٍ جَامِعٍ لَّمْ يَذْهَبُوْا حَتّٰى يَسْتَاْذِنُوْهُ ۗ

63. ඇත්තෙන්ම සැබෑ විශ්වාසිතයින් නම් ඔවුන් අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයාණන් කෙරෙහිද විශ්වාස කරන අය වේ. එමෙන්ම ඔවුන් ඔහු සමග සාමූහික කටයුත්තක යෙදී සිටින විට ඔවුන් ඔහුගෙන් අවසරය පැතීමකින් තොරව නොයා

إِنَّ الَّذِينَ يَسْتَأْذِنُونَكَ أُولَٰئِكَ الَّذِينَ يُؤْمِنُونَ بِاللَّهِ وَرَسُولِهِ ۚ فَإِذَا اسْتَأْذَنُوكَ لِبَعْضِ شَأْنِهِمْ فَأْذَن لِّمَن شِئْتَ مِنْهُمْ وَاسْتَغْفِرْ لَهُمُ اللَّهَ ۚ إِنَّ اللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿٦٢﴾

යුතුය. නියතවශයෙන්ම ඔබගෙන් අවසර ඉල්ලන අය, ඔවුන්ම (සැබෑ ලෙස) අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයාණන් කෙරෙහිද විශ්වාස කරන අය වේ. එබැවින් ඔවුන් තමන්ගේ ඇතැම් කටයුතු සඳහා ඔබගෙන් අවසර ඉල්ලන විට, ඔබ ඔවුන්ගෙන් කැමති අයට අවසර දෙන්න. තවද ඔවුන් වෙනුවෙන් අල්ලාහ්ගෙන් සමාව අයදින්න. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම සමාවන්විතය, පරම දයාබරය.

لَّا تَجْعَلُوا دُعَاءَ الرَّسُولِ بَيْنَكُمْ كَدُعَاءِ بَعْضِكُم بَعْضًا ۚ قَدْ يَعْلَمُ اللَّهُ الَّذِينَ يَتَسَلَّلُونَ مِنكُمْ لِوَاذًا ۚ فَلْيَحْذَرِ الَّذِينَ يُخَالِفُونَ عَنْ أَمْرِهِ أَن تُصِيبَهُمْ فِتْنَةٌ أَوْ يُصِيبَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿٦٣﴾

64. (විශ්වාසිතයිනි) නුඹලා අතර දූතයාණන්ගේ කැඳවීම නුඹලා එකිනෙකාට (කරන) කැඳවීමක් ලෙස නොසලකනු. නුඹලාගෙන් හොරෙන් පැන යන අයව අල්ලාහ් දන්නේය. එබැවින් ඔහුගේ (දූතයාණන්ගේ) විධානයට එරෙහිව යනවුන් (අල්ලාහ් වෙතින්) පිරික්සුමක් අත්වීමෙන් හෝ ඔවුන් කෙරෙහි වේදනීය දඬුවමක් අත්වීමෙන් හෝ ප්‍රවේසම් විය යුතුය.

أَلَا إِنَّ لِلَّهِ مَا فِي السَّمَاوَاتِ وَالْأَرْضِ ۖ قَدْ يَعْلَمُ مَا أَنتُمْ عَلَيْهِ وَيَوْمَ يُرْجَعُونَ إِلَيْهِ فَيُنَبِّئُهُم بِمَا عَمِلُوا ۗ وَاللَّهُ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿٦٤﴾

65. සවන්දෙනු! අහස් සහ පොළොවෙහි ඇති සියළු දේ අල්ලාහ්ටම අයත්ය. සැබැවින්ම නුඹලා කවරෙක්දැයි ඔහු දන්නේය. තවද ඔවුන් ඔහු වෙත ආපසු ගෙන එනු ලබන එදින ඔවුන් කළ දේ ගැන ඔහු ඔවුනට දන්වන්නේය. තවද අල්ලාහ් සියල්ල ඉතා මැනැවින් දන්නේය.



## අල් ෆුර්කාන්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

2. තම දාසයා වෙත ෆුර්කාන් (විමංසනය) පහළ කළ ඔහු ආශිර්වාදයෙන් පරිපූර්ණය. එය ඔහු(දූතයා) සර්ව ලෝකයන්ට අවවාද කරන්නෙකු වනු පිණිසය.

تَبٰرَكَ الَّذِىْ نَزَّلَ الْفُرْقَانَ عَلٰى عَبْدِهٖ لِيَكُوْنَ لِلْعٰلَمِيْنَ نَذِيْرًا ②

3. අහස් සහ පොළොවේ රාජධානිය ඔහුටම හිමිවේ. තවද ඔහු කිසිම පුතෙකු නොගත්තේය. තවද ඔහුට රාජධානියෙහි කිසිදු හවුල්කරුවෙකු නොමැත. තවද ඔහු සියල්ල මවා, (එයට) අදාල ප්‍රමාණය එයට නියම කර ඇත.

الَّذِىْ لَهٗ مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَلَمْ يَتَّخِذْ وَلَدًا وَّلَمْ يَكُنْ لَّهٗ شَرِيْكٌ فِى الْمُلْكِ وَخَلَقَ كُلَّ شَىْءٍ فَقَدَّرَهٗ تَقْدِيْرًا ③

4. එසේ වුවද ඔවුන් ඔහු හැර වෙනත් දෙවිවරුන්ව ගත්තෝය. ඔවුහු (එම දෙවිවරුන්) කිසිවෙකුව මැව්වේ නැත. නමුත් ඔවුහුද මවන ලද්දෝය. තවද තමන්ට හානියක් හෝ යහපතක් හෝ කිරීමට ඔවුන් හට බලයක් නැත. තවද මරණය හෝ ජීවය හෝ පුනරුත්ථානය හෝ කෙරෙහි ඔවුන් හට කිසිදු බලයක්ද නොමැත.

وَاتَّخَذُوْا مِنْ دُوْنِهٖۤ اٰلِهَةً لَّا يَخْلُقُوْنَ شَيْـًٔا وَّهُمْ يُخْلَقُوْنَ وَلَا يَمْلِكُوْنَ لِاَنْفُسِهِمْ ضَرًّا وَّلَا نَفْعًا وَّلَا يَمْلِكُوْنَ مَوْتًا وَّلَا حَيٰوةً وَّلَا نُشُوْرًا ④

5. තවද අවිශ්වාස කළ අය, 'මෙය ඔහු ගෙතූ බොරුවක් මිස අන් කිසිවක් නොවේ. ඇතැම් ජනතාව ඔහුට ඒ සඳහා උදව් කර ඇත'යි පවසති. ඇත්තෙන්ම ඔවුන් අයුක්තියත් බොරුවත් ගෙනහැර පෑහ.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْۤا اِنْ هٰذَاۤ اِلَّاۤ اِفْكُ اِفْتَرٰىهُ وَاَعَانَهٗ عَلَيْهِ قَوْمٌ اٰخَرُوْنَ ۛۚ فَقَدْ جَآءُوْ ظُلْمًا وَّزُوْرًا ⑤

معانقة: اعند المتأخرين

6. තවද ඔවුන් 'මේවා පැරැන්නන්ගේ වෘතාන්තයන් වේ. ඒවා ඔහු ලියවා

وَقَالُوْۤا اَسَاطِيْرُ الْاَوَّلِيْنَ اكْتَتَبَهَا

فَهِيَ تُمْلٰى عَلَيْهِ بُكْرَةً وَّاَصِيْلًا ۝٦

ගත්තේය. තවද, ඔහුට ඒවා උදේ සහ සවස කියවා දෙනු ලබන්නේයැ'යි පවසති.

قُلْ اَنْزَلَهُ الَّذِيْ يَعْلَمُ السِّرَّ فِي السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ اِنَّهٗ كَانَ غَفُوْرًا رَّحِيْمًا ۝٧

7. පවසන්න, 'අහස් සහ පොළොවෙහි රහස් දන්නා ඔහු එය පහළ කළේය. ඇත්තෙන්ම ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය'.

وَقَالُوْا مَالِ هٰذَا الرَّسُوْلِ يَاْكُلُ الطَّعَامَ وَيَمْشِيْ فِي الْاَسْوَاقِ ؕ لَوْلَاۤ اُنْزِلَ اِلَيْهِ مَلَكٌ فَيَكُوْنَ مَعَهٗ نَذِيْرًا ۝٨

8. තවද ඔවුන්, 'මෙම දූතයාට කුමක් සිදුවී ඇත්ද? ඔහු ආහාර අනුභව කරන්නේය. තවද ඔහු කඩ වීදිවල ඇවිදින්නේය. ඔහු සමඟ අවවාදකරුවෙකු වීමට සුරදූතයෙකු ඔහු වෙත පහළ නොකරන ලද්දේ මන්දැ?'යි පවසති.

اَوْ يُلْقٰۤى اِلَيْهِ كَنْزٌ اَوْ تَكُوْنُ لَهٗ جَنَّةٌ يَّاْكُلُ مِنْهَا ؕ وَقَالَ الظّٰلِمُوْنَ اِنْ تَتَّبِعُوْنَ اِلَّا رَجُلًا مَّسْحُوْرًا ۝٩

9. 'නැතහොත් නිධානයක් ඔහු වෙතට පහළ වී තිබිය යුතුය. නැතහොත් එයින් අනුභව කිරීමට ඔහුට උයනක් තිබිය යුතුය'. තවද, වරදකරුවන්, 'නුඹලා අනුගමනය කරන්නේ සූනියම් කරනු ලැබූ මිනිසෙකු විනා අන්කිසිවෙකු නොවේ' යැයි පවසති.

اُنْظُرْ كَيْفَ ضَرَبُوْا لَكَ الْاَمْثَالَ فَضَلُّوْا فَلَا يَسْتَطِيْعُوْنَ سَبِيْلًا ۝١٠

10. ඔවුන් ඔබ ගැන කෙසේ උපමා ගොතන්නේදැයි බලන්න! මෙලෙස ඔවුන් නොමග ගොස් ඇත. එබැවින් ඔවුනට (නිවැරදි) මාර්ගයක් සොයා ගැනීමට නොහැකිය.

تَبٰرَكَ الَّذِيْۤ اِنْ شَآءَ جَعَلَ لَكَ خَيْرًا مِّنْ ذٰلِكَ جَنّٰتٍ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ ۙ وَيَجْعَلْ لَّكَ قُصُوْرًا ۝١١

11. ඔහුම ආශිර්වාදයෙන් පරිපූර්ණය. ඔහු අභිමත වූයේ නම්, ඔබට ඒ සියල්ලට වඩා හොඳ දේවල් එනම් ඒ යටින් ගංගාවල් ගලා බසිනා උද්‍යානයන් ඇති කර දෙන්නේය. තවද ඔබට මාලිගාවන්(ද) ඇති කර දෙන්නේය.

بَلْ كَذَّبُوْا بِالسَّاعَةِ ۚ وَاَعْتَدْنَا لِمَنْ كَذَّبَ بِالسَّاعَةِ سَعِيْرًا ۝١٢

12. නොඑසේය, ඔවුන් එම හෝරාව ප්‍රතික්ෂේප කරති. තවද එම හෝරාව ප්‍රතික්ෂේප කරන අයහට අපි ඇවිලෙන ගින්නක් පිළියෙල කර ඇත්තෙමු.

13. ඈත තැනක සිට එය ඔවුන්ව දකින විට, ඔවුන්ට එහි වියරු හඬද ගෙරවීමද ඇසෙන්නේය.

إِذَا رَأَتْهُم مِّن مَّكَانٍ بَعِيدٍ سَمِعُوا لَهَا تَغَيُّظًا وَزَفِيرًا ﴿١٣﴾

14. තවද ඔවුන්ව දම්වැල් වලින් එකට බැඳ, එහි පටු තැනක ඇද දමනු ලැබූ විට, එහිදී ඔවුහු මරණය පතන්නෝය.

وَإِذَا أُلْقُوا مِنْهَا مَكَانًا ضَيِّقًا مُّقَرَّنِينَ دَعَوْا هُنَالِكَ ثُبُورًا ﴿١٤﴾

15. (එවිට සුරදූතයින්), 'අද දින එක් මරණයක් පමණක් නොපතනු. නමුත් මරණයන් බොහොමයක් පතනු'(යි පවසන්නෝය).

لَّا تَدْعُوا الْيَوْمَ ثُبُورًا وَاحِدًا وَادْعُوا ثُبُورًا كَثِيرًا ﴿١٥﴾

16. පවසන්න, 'එයද වඩා හොඳ නැතහොත් බියබැතිමතුන්හට පොරොන්දු වූ සදාකාලික උයන්ද? ඔවුන්ගේ තිළිණයද (අවසන්) වාසස්ථානයද එය වේ'.

قُلْ أَذَٰلِكَ خَيْرٌ أَمْ جَنَّةُ الْخُلْدِ الَّتِي وُعِدَ الْمُتَّقُونَ ۚ كَانَتْ لَهُمْ جَزَاءً وَمَصِيرًا ﴿١٦﴾

17. එහිදී ඔවුන් කැමති සියළු දේ ඔවුන්ට ලැබෙන්නේය. (ඔවුන් එහි) සදා වෙසෙන්නන්ය. මෙය (ඉටුකිරීම) ඔබගේ අධිපතියාණන් වෙතින් අනිවාර්ය්‍යය වන පොරොන්දුවකි.

لَّهُمْ فِيهَا مَا يَشَاءُونَ خَالِدِينَ ۚ كَانَ عَلَىٰ رَبِّكَ وَعْدًا مَّسْئُولًا ﴿١٧﴾

18. තවද ඔහු ඔවුන්වද, අල්ලාහ් හැර ඔවුන් නැමදුම් කළ අයවද එක්රැස් කරන එම දිනය (සිහිපත් කරනු). පසුව 'මාගේ මේ දාසයින්ව නොමග යැව්වේ නුඹලාද නැතහොත් ඔවුන්ම යහමගින් ඉවත ගියේද?'යි ඔහු අසනු ඇත.

وَيَوْمَ يَحْشُرُهُمْ وَمَا يَعْبُدُونَ مِن دُونِ اللَّهِ فَيَقُولُ أَأَنتُمْ أَضْلَلْتُمْ عِبَادِي هَٰؤُلَاءِ أَمْ هُمْ ضَلُّوا السَّبِيلَ ﴿١٨﴾

19. ඔවුහු, 'ඔබ සුවිශුද්ධය! ඔබ හැර අන් අයව ආරක්ෂකයින් ලෙස ගැනීම අපට යෝග්‍ය නැත. නමුත් ඔබ ඔවුන්ටද ඔවුන්ගේ පියවරුන්ටද (මෙලෝ ජීවිතයේ) යහපත් දේවල් පිරිනැමුවේ ඔවුන් අනුශාසනා අමතක කොට විනාශ වූ ජනතාවක් වනතාක් යැ'යි පවසන්නෝය.

قَالُوا سُبْحَانَكَ مَا كَانَ يَنبَغِي لَنَا أَن نَّتَّخِذَ مِن دُونِكَ مِنْ أَوْلِيَاءَ وَلَٰكِن مَّتَّعْتَهُمْ وَآبَاءَهُمْ حَتَّىٰ نَسُوا الذِّكْرَ وَكَانُوا قَوْمًا بُورًا ﴿١٩﴾

20. (එවිට අපි ප්‍රතිමා පුදන්නන්ට

فَقَدْ كَذَّبُوكُم بِمَا تَقُولُونَ فَمَا

تَسْتَطِيْعُوْنَ صَرْفًا وَّلَا نَصْرًا ۚ وَمَنْ يَّظْلِمْ مِّنْكُمْ نُذِقْهُ عَذَابًا كَبِيْرًا ﴿٢٠﴾

මෙසේ කියන්නෙමු) 'දැන් නුඹලා කියූ දේ ඔවුන් බොරු කළහ. එබැවින් නුඹලාට (දඬුවම) වළක්වාලන්නට හෝ (නුඹලාට) උදව් (ලබාගන්නට) හෝ නොහැක. තවද නුඹලා අතර කවුරුන් හෝ වැරදි කරන්නේද, අපි ඔහුට බරපතල දඬුවමක් විඳින්නට සලස්වන්නෙමු'.

وَمَآ اَرْسَلْنَا قَبْلَكَ مِنَ الْمُرْسَلِيْنَ اِلَّآ اِنَّهُمْ لَيَاْكُلُوْنَ الطَّعَامَ وَيَمْشُوْنَ فِى الْاَسْوَاقِ ؕ وَجَعَلْنَا بَعْضَكُمْ لِبَعْضٍ فِتْنَةً ؕ اَتَصْبِرُوْنَ ۚ وَكَانَ رَبُّكَ بَصِيْرًا ﴿٢١﴾ ع

21. තවද අපි ඔබට පෙර කිසිදු දූතයින් වන ඔවුන්ව නියතවශයෙන්ම ආහාර අනුභව කරන සහ කඩවීදිවල ඇවිදින අය මිස කිසිවිටෙකත් නොඑව්වෙමු. තවද අපි නුඹලාගෙන් සමහරුන්ව සමහරෙකුට පිරික්සුමක් කළෙමු. (එසේ නම්) නුඹලා ඉවසිලිවන්ත නොවන්නෙහුද? තවද ඔබගේ අධිපතියාණන් සියල්ල දකින්නාය.

وَقَالَ الَّذِيْنَ لَا يَرْجُوْنَ لِقَآءَنَا لَوْلَآ اُنْزِلَ عَلَيْنَا الْمَلٰٓئِكَةُ اَوْ نَرٰى رَبَّنَا ؕ لَقَدِ اسْتَكْبَرُوْا فِىٓ اَنْفُسِهِمْ وَعَتَوْ عُتُوًّا كَبِيْرًا ﴿٢٢﴾

19-කොටස

22. තවද අපව හමුවීම ගැන අපේක්ෂාවක් නැති අය (මෙසේ) පැවසූහ. 'අප වෙත සුරදූතයින් පහළ නොකරනු ලබන්නේ මන්ද? නැතහොත් අපගේ අධිපතියාණන්ව අප නොදකින්නේ මන්ද?' නියත වශයෙන්ම ඔවුන් තමන් ගැන අධික ආඩම්බර වූ අතර අතිශයින්ම සීමාවන් ඉක්මවා ඇත්තෝය.

يَوْمَ يَرَوْنَ الْمَلٰٓئِكَةَ لَا بُشْرٰى يَوْمَئِذٍ لِّلْمُجْرِمِيْنَ وَ يَقُوْلُوْنَ حِجْرًا مَّحْجُوْرًا ﴿٢٣﴾

23. යම් දිනක ඔවුන් සුරදූතයින්ව දකින්නේද එදින වරදකරුවන්හට කිසිදු සුභාරංචියක් නොවනු ඇත. තවද ඔවුහු, 'මහත් බාධයකයක් තිබුණා නම්!' යැයි පවසන්නෝය.

وَقَدِمْنَآ اِلٰى مَا عَمِلُوْا مِنْ عَمَلٍ فَجَعَلْنٰهُ هَبَآءً مَّنْثُوْرًا ﴿٢٤﴾

24. තවද ඔවුන් කළ එක් එක් ක්‍රියාවන් දෙසට අපි යොමු වී ඒවා සිසිකඩ වූ විසිරුණු දූවිලි බවට පත්කරන්නෙමු.

25. ස්වර්ගයේ වැසියන් එදින නිරන්තර වාසස්ථානය අතින් විශිෂ්ඨ වන්නෝය. තවද විවේකස්ථානය අතින්ද විශිෂ්ඨ වන්නෝය.

اَصْحٰبُ الْجَنَّةِ يَوْمَئِذٍ خَيْرٌ مُّسْتَقَرًّا وَّاَحْسَنُ مَقِيْلًا ﴿٢٥﴾

26. තවද අහස වලාකුළුවලින් පැළී සුරදූතයින් පිරිවරින් පිරිවර පහළ කරනු ලබන දිනය (සිහිපත් කරනු).

وَيَوْمَ تَشَقَّقُ السَّمَآءُ بِالْغَمَامِ وَنُزِّلَ الْمَلٰٓئِكَةُ تَنْزِيْلًا ﴿٢٦﴾

27. සැබෑ රාජධානිය එදින මහා කාරුණිකයා (වූ දෙවියන්)ට අයත් වන්නේය. තවද එය අවිශ්වාසිතයින්ට මහත් දුෂ්කර දිනයක් වනු ඇත.

اَلْمُلْكُ يَوْمَئِذِ ۨالْحَقُّ لِلرَّحْمٰنِ ؕ وَكَانَ يَوْمًا عَلَى الْكٰفِرِيْنَ عَسِيْرًا ﴿٢٧﴾

28. වරදකරුවා (අන්ත අසරණව) තම අත් සපාගන්නා වූ එම දිනය (සිහිපත් කරනු). ඔහු, 'අහෝ! මා දූතයාණන් සමග එම මග අනුගමනය කරන්නට තිබුණා නම්යැ'යි කියනු ඇත.

وَيَوْمَ يَعَضُّ الظَّالِمُ عَلٰى يَدَيْهِ يَقُوْلُ يٰلَيْتَنِى اتَّخَذْتُ مَعَ الرَّسُوْلِ سَبِيْلًا ﴿٢٨﴾

29. 'අහෝ! මා හට වූ විපත! අසවලාව මා මිත්‍රයෙකු ලෙස නොගත්තා නම්!'

يٰوَيْلَتٰى لَيْتَنِىْ لَمْ اَتَّخِذْ فُلَانًا خَلِيْلًا ﴿٢٩﴾

30. '(දෙවියන්) සිහිකිරීම මා වෙත පැමිණි පසුවද ඔහු මා නොමග යැව්වේය'. තවද ෂෙයිතාන්, මිනිසාව අතරමං කරන්නෙකි.

لَقَدْ اَضَلَّنِىْ عَنِ الذِّكْرِ بَعْدَ اِذْ جَآءَنِىْ ؕ وَكَانَ الشَّيْطٰنُ لِلْاِنْسَانِ خَذُوْلًا ﴿٣٠﴾

31. තවද දූතයාණන්, 'මාගේ අධිපතියාණෙනි! මාගේ ජනතාව ඇත්තෙන්ම මෙම කුර්ආනය ඉවත දමන ලද්දක් ලෙස සැළකූහැ'යි. පවසන්නේය.

وَقَالَ الرَّسُوْلُ يٰرَبِّ اِنَّ قَوْمِى اتَّخَذُوْا هٰذَا الْقُرْاٰنَ مَهْجُوْرًا ﴿٣١﴾

32. මෙලෙස අපි සෑම දූතයෙකුටම පව්කාරයින් අතරින් සතුරෙකු ඇති කළෙමු. තවද මග පෙන්වන්නෙකු හා උදව්කරුවෙකු ලෙස ඔබගේ අධිපතියාණන් ප්‍රමාණවත්ය.

وَكَذٰلِكَ جَعَلْنَا لِكُلِّ نَبِىٍّ عَدُوًّا مِّنَ الْمُجْرِمِيْنَ ؕ وَكَفٰى بِرَبِّكَ هَادِيًا وَّنَصِيْرًا ﴿٣٢﴾

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا لَوْلَا نُزِّلَ عَلَيْهِ الْقُرْاٰنُ جُمْلَةً وَّاحِدَةً ۛ كَذٰلِكَ ۛ لِنُثَبِّتَ بِهٖ فُؤَادَكَ وَرَتَّلْنٰهُ تَرْتِيْلًا ﴿٣٣﴾

33. තවද අවිශ්වාසිතයින් 'ඔහු වෙත කුර්ආනය එකවර මුළුමනින්ම පහළ නොකරන ලද්දේ මන්දැ?'යි පවසති. මෙලෙස (අප එය පහළ කළේ) අප එමගින් ඔබගේ හදවත ශක්තිමත් කරනු පිණිසය. තවද අපි එය විශිෂ්ඨ අන්දමින් ක්‍රමානුකූලව සකස් කර ඇත්තෙමු.

وَلَا يَأْتُوْنَكَ بِمَثَلٍ اِلَّا جِئْنٰكَ بِالْحَقِّ وَاَحْسَنَ تَفْسِيْرًا ﴿٣٤﴾

34. තවද ඔවුන් ඔබ වෙත කිසිදු උපමාවක් ගෙන එන්නේ නැත. නමුත් අපි ඔබ හට සත්‍යයද විශිෂ්ඨ වූ අර්ථ විවරණයද ලබා දෙන්නෙමු.

اَلَّذِيْنَ يُحْشَرُوْنَ عَلٰى وُجُوْهِهِمْ اِلٰى جَهَنَّمَ ۙ اُولٰٓئِكَ شَرٌّ مَّكَانًا وَّاَضَلُّ سَبِيْلًا ﴿٣٥﴾

35. ඔවුන් මුණින් අතට වැටුණු ආකාරයෙන් නිරය වෙතට එකට ගෙනයනු ලබන්නෝය. තත්ත්වය අතින් ඔවුන් ඉතා නරකය. එමෙන්ම (යහ) මාර්ගය අතින් බොහෝ දුර නොමග ගොස්ය.

وَلَقَدْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ وَجَعَلْنَا مَعَهٗٓ اَخَاهُ هٰرُوْنَ وَزِيْرًا ﴿٣٦﴾

36. තවද නියතවශයෙන්ම අපි මූසාට පුස්තකය දුනිමු. තවද ඔහු සමග ඔහුගේ සොහොයුරු හාරූන්ව (ඔහුගේ) සහායකයා ලෙස පත් කළෙමු.

فَقُلْنَا اذْهَبَآ اِلَى الْقَوْمِ الَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِنَا ؕ فَدَمَّرْنٰهُمْ تَدْمِيْرًا ﴿٣٧﴾

37. පසුව 'අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළ ජනතාව වෙතට නුඹලා දෙදෙනා යනු'යි අපි කීවෙමු. පසුව අපි (ප්‍රතික්ෂේප කළ) ඔවුන්ව සහමුලින්ම විනාශ කළෙමු.

وَقَوْمَ نُوْحٍ لَّمَّا كَذَّبُوا الرُّسُلَ اَغْرَقْنٰهُمْ وَجَعَلْنٰهُمْ لِلنَّاسِ اٰيَةً ؕ وَاَعْتَدْنَا لِلظّٰلِمِيْنَ عَذَابًا اَلِيْمًا ﴿٣٨﴾

38. තවද නූහ්ගේ ජනතාව (ගත් කළ) ඔවුන්ද දූතයින්ව ප්‍රතික්ෂේප කළ විට අපි ඔවුන්ව ගිල්වා දැමුවෙමු. තවද ඔවුන්ව අපි මිනිස් වර්ගයාට සළකුණක් කළෙමු. තවද අපි වැරදි කරන්නන් හට වේදනීය දඬුවමක් පිළියෙල කර ඇත්තෙමු.

وَّعَادًا وَّثَمُوْدَا۟ وَاَصْحٰبَ الرَّسِّ وَقُرُوْنًا ۢ بَيْنَ ذٰلِكَ كَثِيْرًا ﴿٣٩﴾

39. ආද් සහ සමූද්වද ළිං ආශ්‍රිත ජනතාවද ඔවුනතර පරම්පරා බොහොමයක්වද (අපි විනාශ කළෙමු).

| | |
|---|---|
| 40. එමෙන්ම අපි ඔවුන් එකිනෙකාට (පෙර ජනතාවගේ) උපමාවන් ගෙනහැර පෑවෙමු. තවද එකෙක් නැර සියල්ලන්වම අපි සහමුලින්ම විනාශ කළෙමු. | وَكُلًّا ضَرَبْنَا لَهُ الْأَمْثَالَ ۖ وَكُلًّا تَبَّرْنَا تَتْبِيرًا ﴿٤٠﴾ |
| 41. තවද ඔවුන් නපුරු වැස්සක් වසින ලද නගරය පසුකර ගියහ. එබැවින් ඔවුන් එය නොදුටුවේද? නොඑසේය, ඔවුන් (නැවත) නැගිටවනු ලැබීම අපේක්ෂා නොකරති. | وَلَقَدْ أَتَوْا عَلَى الْقَرْيَةِ الَّتِي أُمْطِرَتْ مَطَرَ السَّوْءِ ۚ أَفَلَمْ يَكُونُوا يَرَوْنَهَا ۚ بَلْ كَانُوا لَا يَرْجُونَ نُشُورًا ﴿٤١﴾ |
| 42. තවද ඔවුන් ඔබව දකින කල්හි ඔවුන් ඔබව සරදමක් ලෙසම ගනිති. 'අල්ලාහ් දූතයෙකු ලෙස එවා ඇත්තේ මොහුවද?' (යැයි පවසති). | وَإِذَا رَأَوْكَ إِنْ يَتَّخِذُونَكَ إِلَّا هُزُوًا أَهَٰذَا الَّذِي بَعَثَ اللَّهُ رَسُولًا ﴿٤٢﴾ |
| 43. 'අපි ඒ (දෙවිවරුන්) කෙරෙහි ස්ථිරව ඇලී නොසිටියහොත් අපගේ දෙවිවරුන්ගෙන් ඇත්තෙන්ම ඔහු අපිව නොමග යවන්නට ඉඩ තිබුණි'(යි පවසති). තවද ඔවුන් දඬුවම දකිනවිට (සෘජු) මගින් කවරෙකු ඉතාමත් නොමග ගියේදැයි නියතවශයෙන්ම ඔවුන් දැනගන්නෝය. | إِنْ كَادَ لَيُضِلُّنَا عَنْ آلِهَتِنَا لَوْلَا أَنْ صَبَرْنَا عَلَيْهَا ۚ وَسَوْفَ يَعْلَمُونَ حِينَ يَرَوْنَ الْعَذَابَ مَنْ أَضَلُّ سَبِيلًا ﴿٤٣﴾ |
| 44. තම නපුරු සිතැඟියාව තම දෙවියන් කරගත් යමෙකුව ඔබ දැක තිබේද? එසේ නම් ඔබට ඔහු කෙරෙහි ආරක්ෂකයා විය හැකිද? | أَرَأَيْتَ مَنِ اتَّخَذَ إِلَٰهَهُ هَوَاهُ أَفَأَنْتَ تَكُونُ عَلَيْهِ وَكِيلًا ﴿٤٤﴾ |
| 45. ඔවුන්ගෙන් බොහෝ අය සවන් දෙන්නේ යැයි හෝ අවබෝධ කර ගන්නේ යැයි හෝ ඔබ සිතන්නෙහිද? ඔවුන් ගවසතුන් ලෙසමය. නොඑසේය, මාර්ගය අතින් ඔවුන් ඉතාමත් නොමග ගොස්ය. | أَمْ تَحْسَبُ أَنَّ أَكْثَرَهُمْ يَسْمَعُونَ أَوْ يَعْقِلُونَ ۚ إِنْ هُمْ إِلَّا كَالْأَنْعَامِ ۖ بَلْ هُمْ أَضَلُّ سَبِيلًا ﴿٤٥﴾ |
| 46. ඔබ අධිපතියාණන් සෙවනැල්ල කෙසේ දිගු කරන්නේ දැයි ඔබ දැක නොතිබේද? තවද ඔහු අභිමත වූයේ නම් ඔහුට එය නිසල කරන්නට | أَلَمْ تَرَ إِلَىٰ رَبِّكَ كَيْفَ مَدَّ الظِّلَّ وَلَوْ شَاءَ لَجَعَلَهُ سَاكِنًا ثُمَّ جَعَلْنَا الشَّمْسَ |

عَلَيْهِ دَلِيْلًا ﴿٤٦﴾

තිබුණි. පසුව අපි සූර්යයාව එය කෙරෙහි සළකුණක් කළෙමු.

ثُمَّ قَبَضْنٰهُ اِلَيْنَا قَبْضًا يَّسِيْرًا ﴿٤٧﴾

47. පසුව අපි එය ටිකින් ටික අප වෙතට ඇදගන්නෙමු.

وَهُوَ الَّذِىْ جَعَلَ لَكُمُ الَّيْلَ لِبَاسًا وَّالنَّوْمَ سُبَاتًا وَّجَعَلَ النَّهَارَ نُشُوْرًا ﴿٤٨﴾

48. රාත්‍රිය නුඹලාට ආවරණයක් කළේද නින්ද විවේකය සඳහාද දහවල දියුණුවීමට විසිරීයෑම සඳහාද කළේ ඔහුමය.

وَهُوَ الَّذِىْۤ اَرْسَلَ الرِّيٰحَ بُشْرًاۢ بَيْنَ يَدَىْ رَحْمَتِهٖ ۚ وَاَنْزَلْنَا مِنَ السَّمَآءِ مَآءً طَهُوْرًا ﴿٤٩﴾

49. තවද ඔහුගේ දයාවට පෙර ශුභාරංචියක් ලෙස සුළං එවන්නේද ඔහුමය. තවද අපි අහසින් පිරිසිදු ජලය පහළ කරන්නෙමු.

لِّنُحْیِۦَ بِهٖ بَلْدَةً مَّيْتًا وَّنُسْقِيَهٗ مِمَّا خَلَقْنَاۤ اَنْعَامًا وَّاَنَاسِىَّ كَثِيْرًا ﴿٥٠﴾

50. එය අපි එමගින් මළ භූමියට ජීවය දෙනු පිණිසත් අප මැවූ ගවසතුන් සහ මිනිසුන් විශාල ගණනකට පානය කිරීමට සලස්වනු පිණිසත්ය.

وَلَقَدْ صَرَّفْنٰهُ بَيْنَهُمْ لِيَذَّكَّرُوْا ۖ فَاَبٰىۤ اَكْثَرُ النَّاسِ اِلَّا كُفُوْرًا ﴿٥١﴾

51. තවද ඔවුන් මෙනෙහි කරනු පිණිස අපි එය විවිධාකාරව ඔවුනට විග්‍රහ කර දුන්නෙමු. නමුත් බහුතරයක් මිනිසුන් අකෘතඥව ප්‍රතික්ෂේප කළා මිස නැත.

وَلَوْ شِئْنَا لَبَعَثْنَا فِىْ كُلِّ قَرْيَةٍ نَّذِيْرًا ﴿٥٢﴾

52. තවද අප අභිමත වූවා නම් අපට සෑම නගරයකටම අවවාද කරුවෙකුව නියතවශයෙන්ම එවන්නට තිබුණි.

فَلَا تُطِعِ الْكٰفِرِيْنَ وَجَاهِدْهُمْ بِهٖ جِهَادًا كَبِيْرًا ﴿٥٣﴾

53. එබැවින් අවිශ්වාසිතයින්ට අවනත නොවන්න. තවද ඔවුනට එරෙහිව මෙ(කුර්ආනය)මගින් මහත් පරිශ්‍රමයක යෙදෙන්න.

وَهُوَ الَّذِىْ مَرَجَ الْبَحْرَيْنِ هٰذَا عَذْبٌ فُرَاتٌ وَّهٰذَا مِلْحٌ اُجَاجٌ ۚ وَجَعَلَ بَيْنَهُمَا بَرْزَخًا وَّحِجْرًا مَّحْجُوْرًا ﴿٥٤﴾

54. තවද සයුරු දෙක ගලායෑමට සැලැස්වූයේද ඔහුමය. (මෙයින්) එකක් රසවත් හා මිහිරිය. තවද අනෙක ලවණ හා තිත්තය. තවද මේ දෙක අතර ඔහු බාධකයක්ද මහත්වූ බෙදීමක්ද තබා ඇත්තේය.

وَهُوَ الَّذِىْ خَلَقَ مِنَ الْمَآءِ بَشَرًا فَجَعَلَهٗ نَسَبًا وَّصِهْرًا ؕ وَكَانَ رَبُّكَ قَدِيْرًا ﴿٥٥﴾

55. තවද මිනිසාව ජලයෙන් මැව්වේ ඔහුමය. තවද ඔහුට පෙළපතින් එන නෑකම්ද විවාහයෙන් එන නෑකම්ද ඇති කළේය. තවද ඔබගේ අධිපතියාණන් සර්ව බලධාරීය.

وَيَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ مَا لَا يَنْفَعُهُمْ وَلَا يَضُرُّهُمْ ؕ وَكَانَ الْكَافِرُ عَلٰى رَبِّهٖ ظَهِيْرًا ﴿٥٦﴾

56. තවද ඔවුන් තමන්ට යහපතක් කළ නොහැකි වූද තමන්ට හානියක් කළ නොහැකි වූද අල්ලාහ් හැර අන් දෙයට නමදින්නෝය. තවද අවිශ්වාසිතයා තම අධිපතියාණන්ට එරෙහිව (නැගී සිටින්නන්ට) නිරතුරුවම උදව් කරන්නෙකි.

وَمَاۤ اَرْسَلْنٰكَ اِلَّا مُبَشِّرًا وَّنَذِيْرًا ﴿٥٧﴾

57. තවද ශුභාරංචි ගෙන එන්නකු සහ අවවාද කරන්නෙකු මිස අපි ඔබව නොඑව්වෙමු.

قُلْ مَاۤ اَسْـَٔلُكُمْ عَلَيْهِ مِنْ اَجْرٍ اِلَّا مَنْ شَآءَ اَنْ يَّتَّخِذَ اِلٰى رَبِّهٖ سَبِيْلًا ﴿٥٨﴾

58. පවසන්න 'යමෙක් කැමති වන්නේද ඔහු තම අධිපතියාණන් වෙත මගක් සාදා ගැනීම හැරෙන්නට මම නුඹලාගෙන් ඒ සඳහා ප්‍රතිලාභයක් නොඉල්ලමි'.

وَتَوَكَّلْ عَلَى الْحَىِّ الَّذِىْ لَا يَمُوْتُ وَسَبِّحْ بِحَمْدِهٖ ؕ وَكَفٰى بِهٖ بِذُنُوْبِ عِبَادِهٖ خَبِيْرًا ۚ ۛ ﴿٥٩﴾

59. තවද මරණයට පත් නොවන සදාජීවමානයා කෙරෙහි ඔබ විශ්වාසය තබන්න. තවද ඔහුගේ ප්‍රසංශාව සමග ඔහුව සුවිශුද්ධ කරන්න. තවද ඔහු තම දාසයින්ගේ පව් දැන සිටින්නෙකු වශයෙන් ප්‍රමාණවත්ය.

اۨلَّذِىْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ وَمَا بَيْنَهُمَا فِىْ سِتَّةِ اَيَّامٍ ثُمَّ اسْتَوٰى عَلَى الْعَرْشِ ۛ ۚ اَلرَّحْمٰنُ فَسْـَٔلْ بِهٖ خَبِيْرًا ﴿٦٠﴾

60. අහස්ද පොළොවද ඒ අතර ඇති සියල්ලද කාලපරිච්ඡේද හයකදී මැව්වේ ඔහුමය. පසුව ඔහු තමාව සිංහාසනය මත ස්ථාවර කර ගත්තේය. (ඔහු) පරම දයාබරය, එමනිසා මැනවින් දැනුම්තේරුම් ඇති කෙනෙකුගෙන් ඔහු ගැන විමසනු.

وَاِذَا قِيْلَ لَهُمُ اسْجُدُوْا لِلرَّحْمٰنِ قَالُوْا وَمَا الرَّحْمٰنُ ۗ اَنَسْجُدُ لِمَا تَاْمُرُنَا وَزَادَهُمْ نُفُوْرًا ﴿٦١﴾ ۩ ع

61. තවද 'පරම දයාබර(දෙවියන්)ට යටහත් වනු'යි ඔවුනට කියනු ලැබූ කල්හි, ඔවුහු 'පරම දයාබර (දෙවියන්) කවරෙක්ද? ඔබ අපට අණ කරන ඕනෑම දෙයකට අප යටහත් විය යුතුදැ?'යි අසන්නෝය. තවද එය ඔවුන්ගේ වෛරය තවත් වැඩි කරන්නේය.

تَبٰرَكَ الَّذِىْ جَعَلَ فِى السَّمَآءِ بُرُوْجًا وَّجَعَلَ فِيْهَا سِرٰجًا وَّ قَمَرًا مُّنِيْرًا ﴿٦٢﴾

62. අහස්හි තාරකා මණ්ඩලයන් මවා එහි දීප්තිමත් පහන (ඉර) හා බැබළෙන සඳ පිහිටුවා ඇති ඔහු ආශිර්වාදයෙන් පරිපූර්ණය.

وَهُوَ الَّذِىْ جَعَلَ الَّيْلَ وَالنَّهَارَ خِلْفَةً لِّمَنْ اَرَادَ اَنْ يَّذَّكَّرَ اَوْ اَرَادَ شُكُوْرًا ﴿٦٣﴾

63. තවද මෙනෙහි කිරීමට ප්‍රිය කරන්නෙකුට හෝ කෘතඥවීමට ප්‍රිය කරන්නෙකුට හෝ රාත්‍රිය සහ දහවල එය එකිනෙක ලුහුබැඳීමට සැලසුම් කළේ ඔහුමය.

وَعِبَادُ الرَّحْمٰنِ الَّذِيْنَ يَمْشُوْنَ عَلَى الْاَرْضِ هَوْنًا وَّاِذَا خَاطَبَهُمُ الْجٰهِلُوْنَ قَالُوْا سَلٰمًا ﴿٦٤﴾

64. තවද මහා කාරුණික (දෙවියන්)ගේ දාසයින් කවරෙකු නම්, ඔවුන් පොළොව මත සන්සුන්ව ගමන් කරති. තවද අඥානයින් ඔවුන්ව අමතන කල්හි, ඔවුන් 'සාමය අත්වේවා!'යි කියති.

وَالَّذِيْنَ يَبِيْتُوْنَ لِرَبِّهِمْ سُجَّدًا وَّقِيَامًا ﴿٦٥﴾

65. තවද ඔවුන් තම අධිපතියාණන් අභියස නමස්කාරයෙහි දණින් වැටෙමින්ද සිටගනිමින්ද රාත්‍රිය ගත කරන්නන්ය.

وَالَّذِيْنَ يَقُوْلُوْنَ رَبَّنَا اصْرِفْ عَنَّا عَذَابَ جَهَنَّمَ ۖ اِنَّ عَذَابَهَا كَانَ غَرَامًا ﴿٦٦﴾

66. තවද ඔවුන්, 'අපගේ අධිපතියාණෙනි! නිරයේ දඬුවමින් අපව වළක්වනු මැනව. කිම්දයත් එහි දඬුවම දරුණු වේදනාවක් යැ'යි කියන්නන්ය.

اِنَّهَا سَآءَتْ مُسْتَقَرًّا وَّمُقَامًا ﴿٦٧﴾

67. ඇත්තෙන්ම එය තාවකාලික නවාතැනක් ලෙසත් නිරන්තර වාසස්ථානයක් ලෙසත් ඉතාමත් නපුරුය.

وَالَّذِيْنَ اِذَآ اَنْفَقُوْا لَمْ يُسْرِفُوْا وَلَمْ يَقْتُرُوْا وَكَانَ بَيْنَ ذٰلِكَ قَوَامًا ﴿٦٨﴾

68. තවද ඔවුන් වියදම් කරනවිට පමණ ඉක්මවා වියදම් නොකරති තවද මසුරුකම්ද නොකරති. නමුත් ඒ දෙක අතර මධ්‍යස්ථ වන්නන්ය.

وَالَّذِيْنَ لَا يَدْعُوْنَ مَعَ اللّٰهِ اِلٰهًا اٰخَرَ وَلَا يَقْتُلُوْنَ النَّفْسَ الَّتِىْ حَرَّمَ اللّٰهُ اِلَّا

69. තවද ඔවුන් අල්ලාහ් හැර අන් කිසිදු දෙවියෙකුව නොකැඳවති. තවද අල්ලාහ් තහනම් කර ඇති පිවියෙකුව සාධාරණ හේතුවක් නොමැතිව ඝාතනය නොකරති. තවද පරදාර සේවනයෙහි නොයෙදෙති. තවද

بِالْحَقِّ وَلَا يَزْنُونَ ۚ وَمَنْ يَّفْعَلْ ذٰلِكَ يَلْقَ اَثَامًا ۙ﴿٦٩﴾

යමෙක් එසේ කරන්නේද ඔහු එම පාපයේ දඬුවම ලබන්නේය.

يُّضٰعَفْ لَهُ الْعَذَابُ يَوْمَ الْقِيٰمَةِ وَيَخْلُدْ فِيْهٖ مُهَانًا ۖ﴿٧٠﴾

70. පුනරුත්ථාන දිනයේදී ඔහුට දඬුවම දෙගුණ කරනු ලබන්නේය. තවද ඔහු නින්දිතව එහි දිගුකල් වෙසෙනු ඇත.

اِلَّا مَنْ تَابَ وَاٰمَنَ وَعَمِلَ عَمَلًا صَالِحًا فَاُولٰٓئِكَ يُبَدِّلُ اللّٰهُ سَيِّاٰتِهِمْ حَسَنٰتٍ ۗ وَكَانَ اللّٰهُ غَفُوْرًا رَّحِيْمًا ﴿٧١﴾

71. කවුරුන් හෝ පසුතැවිලි වී විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නේද ඔවුන් හැරය. මෙවන් අය ගත්කළ, අල්ලාහ් මොවුන්ගේ නපුරු ක්‍රියාවන් යහපත් ක්‍රියාවන් බවට හරවන්නේය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَمَنْ تَابَ وَعَمِلَ صَالِحًا فَاِنَّهٗ يَتُوْبُ اِلَى اللّٰهِ مَتَابًا ﴿٧٢﴾

72. තවද පසුතැවිලි වී යහපත් (ක්‍රියාවන්) කරන අය සැබැවින්ම පසුතැවිලි වෙමින් අල්ලාහ් වෙතට හැරෙති.

وَالَّذِيْنَ لَا يَشْهَدُوْنَ الزُّوْرَ ۙ وَاِذَا مَرُّوْا بِاللَّغْوِ مَرُّوْا كِرَامًا ﴿٧٣﴾

73. තවද ඔවුන් බොරු සාක්ෂි නොදරන්නන්ය. තවද ඔවුන් නිශ්ඵල දේ පසුකර යනවිට, ඔවුන් ගෞරවයෙන් යුතුව පසුකර යති.

وَالَّذِيْنَ اِذَا ذُكِّرُوْا بِاٰيٰتِ رَبِّهِمْ لَمْ يَخِرُّوْا عَلَيْهَا صُمًّا وَّعُمْيَانًا ﴿٧٤﴾

74. තවද ඔවුන්ට තම අධිපතියාණන්ගේ වදන් මතක් කරනු ලබන විට, ඔවුන් එයට බිහිරින් සහ අන්ධයින් ලෙස නොහැසිරෙති.

وَالَّذِيْنَ يَقُوْلُوْنَ رَبَّنَا هَبْ لَنَا مِنْ اَزْوَاجِنَا وَذُرِّيّٰتِنَا قُرَّةَ اَعْيُنٍ وَّاجْعَلْنَا لِلْمُتَّقِيْنَ اِمَامًا ﴿٧٥﴾

75. තවද ඔවුන්, 'අපගේ අධිපතියාණෙනි! අපහට, අපගේ කලත්‍රයින් සහ අපගේ දරුවන්ගෙන් (අපගේ) නෙත්වලට සිසිලස ලබාදෙනු මැනව. තවද අපව බියබැතිමතුන්ට නායකයෙකු කරනු මැනවැ'යි පවසන්නන්ය.

اُولٰٓئِكَ يُجْزَوْنَ الْغُرْفَةَ بِمَا صَبَرُوْا

76. එවැන්නන් ස්ථිරසාර වූ බැවින් (ස්වර්ගයෙහි) උසස් ස්ථාන ඔවුන්ටම

وَيُلَقَّوْنَ فِيهَا تَحِيَّةً وَسَلَٰمًا ۝٧٦

තිළිණ කරනු ලබන්නේය. තවද එහිදී ඔවුන් සුභ පැතුමෙන් සහ සාමයෙන් පිළිගනු ලබන්නෝය.

خَٰلِدِينَ فِيهَا ۚ حَسُنَتْ مُسْتَقَرًّا وَمُقَامًا ۝٧٧

77. එහිම සදාකල් වෙසෙන්නන්ය. එය තාවකාලික නවාතැනක් ලෙසත් නිරන්තර වාසස්ථානයක් ලෙසත් ඉතා අනර්ඝය.

قُلْ مَا يَعْبَؤُا بِكُمْ رَبِّي لَوْلَا دُعَآؤُكُمْ ۖ فَقَدْ كَذَّبْتُمْ فَسَوْفَ يَكُونُ لِزَامًا ۝٧٨

78. (අවිශ්වාසීනයින්ට) පවසන්න. 'නුඹලා වෙතින් යාච්ඤාව නොවන්නට, මාගේ අධිපතියාණන් නුඹලා ගැන සැළකිළිමත් නොවන්නේය. නුඹලා ඇත්තෙන්ම (සත්‍යය) ප්‍රතික්ෂේප කළෙහුය. තවද (නුඹලාගේ ප්‍රතික්ෂේපයට දඬුවම) දැන් (නුඹලාට) අත්වනු නියතය'.



අල් ෂුඅරා
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝١

2. තා, සීන්, මීම්◆.

طٰسٓمّٓ ۝٢

3. මේවා පැහැදිලි ග්‍රන්ථයේ වාක්‍යයන් වේ.

تِلْكَ اٰيٰتُ الْكِتٰبِ الْمُبِيْنِ ۝٣

4. ඔවුන් විශ්වාසීතයින් නොවන නිසා ඔබ දුක් වී තමාවම නැතිකර ගන්නෙහිද?

لَعَلَّكَ بَاخِعٌ نَّفْسَكَ اَلَّا يَكُوْنُوْا مُؤْمِنِيْنَ ۝٤

5. අප අභිමත කළේ නම් අපට ඔවුන් කෙරෙහි අහසින් සළකුණක් පහළ කළ හැකිය. එවිට එය ඉදිරියෙහි ඔවුන්ගේ ගෙල නැමෙනු ඇත.

اِنْ نَّشَاْ نُنَزِّلْ عَلَيْهِمْ مِّنَ السَّمَآءِ اٰيَةً فَظَلَّتْ اَعْنَاقُهُمْ لَهَا خٰضِعِيْنَ ۝٥

6. තවද පරම දයාබර (දෙවියන්) වෙතින් ඔවුනට නව අනුශාසනාවක් පැමිණි සැමවිටම ඔවුහු එයින් පිටුපා යති.

وَمَا يَاْتِيْهِمْ مِّنْ ذِكْرٍ مِّنَ الرَّحْمٰنِ مُحْدَثٍ اِلَّا كَانُوْا عَنْهُ مُعْرِضِيْنَ ۝٦

7. ඇත්තෙන්ම ඔවුන් (එය) මුසාවක් ලෙස සැළකූහ. එහෙයින් ඔවුන් සරදම් කළ දේ පිළිබඳව ආරංචි හනිකව ඔවුනට පැමිණෙනු ඇත.

فَقَدْ كَذَّبُوْا فَسَيَاْتِيْهِمْ اَنْۢبٰٓؤُا مَا كَانُوْا بِهٖ يَسْتَهْزِءُوْنَ ۝٧

8. ඔවුන් පොළොව දෙස නොබලන්නෝද? අපි එහි කොපමණ උසස් ඝනයේ විශේෂයන් වැඩෙන්නට සැලැස්වූවෙමුද?

اَوَلَمْ يَرَوْا اِلَى الْاَرْضِ كَمْ اَنْۢبَتْنَا فِيْهَا مِنْ كُلِّ زَوْجٍ كَرِيْمٍ ۝٨

9. එහි ඇත්තෙන්ම සළකුණක් ඇත. නමුත් ඔවුන්ගෙන් බොහොමයක් විශ්වාසීතයින් නොවනු ඇත.

اِنَّ فِيْ ذٰلِكَ لَاٰيَةً ۭ وَمَا كَانَ اَكْثَرُهُمْ مُّؤْمِنِيْنَ ۝٩

10. තවද සැබැවින්ම ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

وَاِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيْزُ الرَّحِيْمُ ۝١٠ ع

◆ පරිශුද්ධය, සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

| | |
|---|---|
| 11. තවද 'වැරදි කරන ජනතාව වෙතට යන්නැ'යි (පවසමින්) ඔබගේ අධිපතියාණන් මූසාට ඇමතූ අවස්ථාව (සිහිපත් කරන්න). | وَإِذْ نَادَىٰ رَبُّكَ مُوسَىٰٓ أَنِ ٱئْتِ ٱلْقَوْمَ ٱلظَّٰلِمِينَ ﴿١١﴾ |
| 12. '(එනම්) ෆිර්අවුන්ගේ ජනතාව වෙතටය. ඔවුන් බියබැතිමත් නොවන්නෙහුද?' | قَوْمَ فِرْعَوْنَ ۚ أَلَا يَتَّقُونَ ﴿١٢﴾ |
| 13. 'මාගේ අධිපතියාණෙනි! ඔවුන් මාව බොරුකාරයෙකු ලෙස සළකනු ඇතැයි නියතවශයෙන්ම මම බියවන්නෙමි'යි ඔහු කිවේය. | قَالَ رَبِّ إِنِّىٓ أَخَافُ أَن يُكَذِّبُونِ ﴿١٣﴾ |
| 14. 'තවද මාගේ පපුවට හිරකමක් දැනෙන්නේය. තවද මාගේ දිවද චතුරව කතා නොකරයි. එබැවින් හාරූන් වෙතද (ඔබගේ දූත පණිවිඩය) යවනු මැනව'. | وَيَضِيقُ صَدْرِى وَلَا يَنطَلِقُ لِسَانِى فَأَرْسِلْ إِلَىٰ هَٰرُونَ ﴿١٤﴾ |
| 15. 'තවද ඇතැම් වැරදි (චෝදනා) මත ඔවුන්ට මාව උවමනා වී ඇත. එබැවින් ඔවුන් මාව මරා දමනු ඇතැයි මා බිය වන්නෙමි'. | وَلَهُمْ عَلَىَّ ذَنۢبٌ فَأَخَافُ أَن يَقْتُلُونِ ﴿١٥﴾ |
| 16. (එයට දෙවියන්), "'කිසිවිටෙකත් නොව, එබැවින් අපගේ සළකුණු සමග ඔබලා දෙදෙනා යනු. අපි ඔබලා සමගය. (තවද) අපි අසන්නෙමු'යි කීවේය. | قَالَ كَلَّا ۖ فَٱذْهَبَا بِـَٔايَٰتِنَآ ۖ إِنَّا مَعَكُم مُّسْتَمِعُونَ ﴿١٦﴾ |
| 17. 'එබැවින් ඔබලා දෙදෙනා ෆිර්අවුන් වෙත යනු'. තවද 'අපි, සර්ව ලෝකයන්ටම අධිපතියාණන්ගේ දූතයින් වෙමු'යි පවසනු. | فَأْتِيَا فِرْعَوْنَ فَقُولَآ إِنَّا رَسُولُ رَبِّ ٱلْعَٰلَمِينَ ﴿١٧﴾ |
| 18. 'අප සමග ඉස්රාඊලයේ දරුවන්ව එවන්නැ'යි (යන පණිවිඩය පැවසීමටය)" | أَنْ أَرْسِلْ مَعَنَا بَنِىٓ إِسْرَٰٓءِيلَ ﴿١٨﴾ |
| 19. 'අපි නුඹව අප අතර බාලවියේ සිට හදාවඩා නොගත්තෙමුද? තවද නුඹගේ ජීවිතයෙහි වසර (ගණනාවක්) නුඹ අප අතර ගතකළෙහියැ'යි (ෆිර්අවුන්) පැවසුවේය. | قَالَ أَلَمْ نُرَبِّكَ فِينَا وَلِيدًا وَلَبِثْتَ فِينَا مِنْ عُمُرِكَ سِنِينَ ﴿١٩﴾ |
| 20. 'තවද නුඹ කළ නුඹගේ එම | وَفَعَلْتَ فَعْلَتَكَ ٱلَّتِى فَعَلْتَ وَأَنتَ مِنَ |

الْكٰفِرِيْنَ ﴿٢٠﴾

ක්‍රියාවම නුඹ කළෙහිය. තවද නුඹ අකෘතඥයන් ගෙන්ය'.

قَالَ فَعَلْتُهَآ اِذًا وَّاَنَا مِنَ الضَّآلِّيْنَ ﴿٢١﴾

21. 'මම නොදැනුවත්ව සිටිය එම අවස්ථාවේදී මම එසේ කළෙමි'යි (මූසා) කීවේය.

فَفَرَرْتُ مِنْكُمْ لَمَّا خِفْتُكُمْ فَوَهَبَ لِيْ رَبِّيْ حُكْمًا وَّجَعَلَنِيْ مِنَ الْمُرْسَلِيْنَ ﴿٢٢﴾

22. 'එබැවින් මම නුඹලාට බිය වූ කල්හි මම නුඹලාගෙන් පලාගියෙමි. පසුව මාගේ අධිපතියාණන් මා හට ප්‍රඥාව ලබාදුන්නේය. තවද මා දූතයින්ගෙන් (කෙනෙක්) කළේය'.

وَتِلْكَ نِعْمَةٌ تَمُنُّهَا عَلَيَّ اَنْ عَبَّدْتَّ بَنِيْٓ اِسْرَآءِيْلَ ﴿٢٣﴾

23. 'තවද නුඹ මා කෙරෙහි කියාපාන මේ උපකාරය නුඹ ඉස්රාඊලයේ දරුවන් වහල් බවට පත් කරගෙන සිටිමද?'.

قَالَ فِرْعَوْنُ وَمَا رَبُّ الْعٰلَمِيْنَ ﴿٢٤﴾

24. 'එසේනම් සර්ව ලෝකයන්ටම අධිපතියාණන් කවුරුන්දෑ?'යි ෆිර්අවුන් ඇසුවේය.

قَالَ رَبُّ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَيْنَهُمَا ؕ اِنْ كُنْتُمْ مُّوْقِنِيْنَ ﴿٢٥﴾

25. 'නුඹලා ස්ථිර විශ්වාසය ඇත්තවුන් නම්, අහස් සහ පොළොවේද ඒ දෙක අතර සියල්ලේද අධිපතියාණන් (ඔහු) යැ'යි (මූසා) කීවේය.

قَالَ لِمَنْ حَوْلَهٗٓ اَلَا تَسْتَمِعُوْنَ ﴿٢٦﴾

26. 'නුඹලාට නොඇසෙන්නේදෑ?'යි (ෆිර්අවුන්) ඔහු වටා සිටින අයට කීවේය.

قَالَ رَبُّكُمْ وَرَبُّ اٰبَآئِكُمُ الْاَوَّلِيْنَ ﴿٢٧﴾

27. '(ඔහු) නුඹලාගේ අධිපතියාණන්ද නුඹලාගේ පෙර විසූ පියවරුන්ගේ අධිපතියාණන්ද වේයැ'යි (මූසා) කීවේය.

قَالَ اِنَّ رَسُوْلَكُمُ الَّذِيْٓ اُرْسِلَ اِلَيْكُمْ لَمَجْنُوْنٌ ﴿٢٨﴾

28. 'නියතවශයෙන්ම නුඹලා වෙත එවන ලද නුඹලාගේ මෙම දූතයා උම්මත්තකයෙකි'යි (ෆිර්අවුන්) කීවේය.

قَالَ رَبُّ الْمَشْرِقِ وَالْمَغْرِبِ وَمَا بَيْنَهُمَا ؕ اِنْ كُنْتُمْ تَعْقِلُوْنَ ﴿٢٩﴾

29. 'නුඹලා වටහා ගන්නේ නම්, නැගෙනහිරටද බටහිරටද ඒ දෙක අතර ඇති සියළු දේටද අධිපතියාණන් (ඔහු) යැ'යි (මූසා) කීවේය.

| | |
|---|---|
| 30. 'නුඹ මා හැර අන් දෙවියෙකුව ඇති කර ගත්තේ නම්, නිශ්චිතවම මම නුඹව සිරගත කරන්නෙමි'යි (ෆිර්අවුන්) කීවේය. | قَالَ لَئِنِ اتَّخَذْتَ إِلَٰهًا غَيْرِي لَأَجْعَلَنَّكَ مِنَ الْمَسْجُونِينَ ﴿٣٠﴾ |
| 31. 'කිමද, මා නුඹ වෙත ප්‍රකට වූ යමක් ඉදිරිපත් කළද!' යැයි (මූසා) කීවේය. | قَالَ أَوَلَوْ جِئْتُكَ بِشَيْءٍ مُّبِينٍ ﴿٣١﴾ |
| 32. 'එසේ නුඹ සත්‍ය පවසන්නෙක් නම් එය ඉදිරිපත් කරවැ'යි (ෆිර්අවුන්) කීවේය. | قَالَ فَأْتِ بِهِ إِن كُنتَ مِنَ الصَّادِقِينَ ﴿٣٢﴾ |
| 33. එබැවින් ඔහු තම සැරයටිය බිමට විසි කළේය. තවද එසැනින්ම එය පැහැදිලිව පෙනෙන සර්පයෙක් විය. | فَأَلْقَىٰ عَصَاهُ فَإِذَا هِيَ ثُعْبَانٌ مُّبِينٌ ﴿٣٣﴾ |
| 34. තවද ඔහු තම අත එළියට ගත්තේය. එසැනින්ම! නරඹන්නන්ට එය සුදට පෙනුනි. | وَنَزَعَ يَدَهُ فَإِذَا هِيَ بَيْضَاءُ لِلنَّاظِرِينَ ﴿٣٤﴾ |
| 35. 'නියතවශයෙන්ම මොහු ඉතාමත් දක්ෂ මායාකරුවෙකුයැ'යි (ෆිර්අවුන්) ඔහු වටා සිටි ප්‍රධානීන්ට කීවේය. | قَالَ لِلْمَلَإِ حَوْلَهُ إِنَّ هَٰذَا لَسَاحِرٌ عَلِيمٌ ﴿٣٥﴾ |
| 36. 'ඔහු තම මායාවෙන් නුඹලාව නුඹලාගේ භූමියෙන් බැහැර කිරීමට පතන්නේය. දැන් නුඹලා කුමක් උපදෙස් දෙන්නෙහුද?' | يُرِيدُ أَن يُخْرِجَكُم مِّنْ أَرْضِكُم بِسِحْرِهِ فَمَاذَا تَأْمُرُونَ ﴿٣٦﴾ |
| 37. 'ඔහුටත් ඔහුගේ සහෝදරයාටත් (ටික කලක්) ලබා දෙන්න. තවද නගරවලට අඬබෙර කරුවන්ව යවන්නැ'යි ඔවුහු කීහ. | قَالُوا أَرْجِهْ وَأَخَاهُ وَابْعَثْ فِي الْمَدَائِنِ حَاشِرِينَ ﴿٣٧﴾ |
| 38. 'ඔවුන් සෑම දක්ෂ මායාකරුවෙකුවම ඔබ වෙත ගෙන ආ යුතුය'. | يَأْتُوكَ بِكُلِّ سَحَّارٍ عَلِيمٍ ﴿٣٨﴾ |
| 39. මේ අනුව මායාකරුවන් නියමිත දිනයක නියමිත වේලාවකදී එක්රැස් කරන ලදී. | فَجُمِعَ السَّحَرَةُ لِمِيقَاتِ يَوْمٍ مَّعْلُومٍ ﴿٣٩﴾ |
| 40. තවද 'නුඹලා රැස් වන්නෙහුද?'යි ජනයාගෙන් අසන ලදී. | وَقِيلَ لِلنَّاسِ هَلْ أَنتُم مُّجْتَمِعُونَ ﴿٤٠﴾ |
| 41. 'අපට මායාකරුවන්ව අනුගමනය කළ හැකිය. ඔවුන් ජයග්‍රාහිකයින් වන්නේ නම්'. | لَعَلَّنَا نَتَّبِعُ السَّحَرَةَ إِن كَانُوا هُمُ الْغَالِبِينَ ﴿٤١﴾ |

فَلَمَّا جَآءَ السَّحَرَةُ قَالُوْا لِفِرْعَوْنَ اَئِنَّ لَنَا لَاَجْرًا اِنْ كُنَّا نَحْنُ الْغٰلِبِيْنَ ﴿٤٢﴾

42. තවද මන්ත්‍රකරුවන් පැමිණි විට ඔවුහු, 'අප දිනුවේ නම් අපට තිළිණ ලැබෙන්නේදැ'යි ෆිර්අවුන්ගෙන් ඇසුහ.

قَالَ نَعَمْ وَاِنَّكُمْ اِذًا لَّمِنَ الْمُقَرَّبِيْنَ ﴿٤٣﴾

43. 'එසේ'ය, නුඹලාද නියතවශයෙන්ම (මාගේ) ප්‍රසාදයට ලක්වූවන් අතරට පත්වන්නෙහුයැ'යි ඔහු කීවේය.

قَالَ لَهُمْ مُّوْسٰۤى اَلْقُوْا مَاۤ اَنْتُمْ مُّلْقُوْنَ ﴿٤٤﴾

44. මූසා, 'දැන් නුඹලා විසි කරන්නට යන දේ විසිකරනු'යි ඔවුනට කීවේය.

فَاَلْقَوْا حِبَالَهُمْ وَعِصِيَّهُمْ وَقَالُوْا بِعِزَّةِ فِرْعَوْنَ اِنَّا لَنَحْنُ الْغٰلِبُوْنَ ﴿٤٥﴾

45. එබැවින් ඔවුන් තමන්ගේ කඹද තමන්ගේ සැරයටියන්ද විසි කළහ. තවද 'ෆිර්අවුන්ගේ ගෞරවයේ නාමයෙන් නියතවශයෙන්ම අපි ජයග්‍රහණය කරන්නෙමු'යි කීහ.

فَاَلْقٰى مُوْسٰى عَصَاهُ فَاِذَا هِىَ تَلْقَفُ مَا يَاْفِكُوْنَ ﴿٤٦﴾

46. එවිට මූසාද තමාගේ සැරයටිය විසි කළේය. එසැනින්ම එය ඔවුන් මවා පෑ දේ (සියල්ල) ගිල ගත්තේය.

فَاُلْقِىَ السَّحَرَةُ سٰجِدِيْنَ ﴿٤٧﴾

47. එවිට මායාකරුවන් අවනතව දණින් වැටීමට සලස්වන ලදී.

قَالُوْۤا اٰمَنَّا بِرَبِّ الْعٰلَمِيْنَ ﴿٤٨﴾

48. 'අපි සර්ව ලෝකයන්හි අධිපතියාණන් කෙරෙහි විශ්වාස කරන්නෙමු'යි ඔවුහු කීහ.

رَبِّ مُوْسٰى وَهٰرُوْنَ ﴿٤٩﴾

49. '(එනම්) මූසාගේ සහ හාරූන්ගේ අධිපතියාණන් කෙරෙහිය'(යැයිද කීහ).

قَالَ اٰمَنْتُمْ لَهٗ قَبْلَ اَنْ اٰذَنَ لَكُمْ ۚ اِنَّهٗ لَكَبِيْرُكُمُ الَّذِىْ عَلَّمَكُمُ السِّحْرَ ۚ فَلَسَوْفَ تَعْلَمُوْنَ ۬ لَاُقَطِّعَنَّ اَيْدِيَكُمْ وَاَرْجُلَكُمْ مِّنْ خِلَافٍ وَّلَاُوصَلِّبَنَّكُمْ اَجْمَعِيْنَ ۚ ﴿٥٠﴾

50. 'මා නුඹලාට අවසර දීමටත් පෙර නුඹලා ඔහු කෙරෙහි විශ්වාස කළෙහුද? නියතවශයෙන්ම නුඹලාට මායාශිල්පය ඉගැන්වූ නායකයා ඔහුමය. එහෙත් නුඹලා ඉක්මනින්ම (එහි විපාක) දැනගන්නෙහුමය. තවද නියතවශයෙන්ම මම නුඹලාගේ අත් සහ නුඹලාගේ පාදයන් ඒකාන්තර පැතිවලට කපා හරින්නෙමි. තවද මම නුඹලා සියල්ලන්ටම නියතවශයෙන්ම කුරුසයේ දඬුවමද දෙන්නෙමි'යි (ෆිර්අවුන්) කීවේය.

51. 'එයට කමක් නැත. අප අධිපතියාණන් වෙතටම අපි ආපසු යන්නන් වන්නෙමු'යි ඔවුන් කීහ.

قَالُوْا لَا ضَيْرَ اِنَّاۤ اِلٰى رَبِّنَا مُنْقَلِبُوْنَ ﴿٥١﴾

52. 'අප විශ්වාසිතයින් අතුරින් ප්‍රථමයන් වන හෙයින් අපගේ අධිපතියාණන් අපගේ පව් ක්ෂමා කරනු ඇතැයි අපි අපේක්ෂා කරන්නෙමු'(යි ඔවුන් කීහ).

اِنَّا نَطْمَعُ اَنْ يَّغْفِرَ لَنَا رَبُّنَا خَطٰيٰنَاۤ اَنْ كُنَّاۤ اَوَّلَ الْمُؤْمِنِيْنَ ﴿٥٢﴾ ع

53. තවද අපි මූසා වෙත, 'රාත්‍රියෙහිදී මාගේ දාසයින්ව රැගෙන යන්න. නියතවශයෙන්ම නුඹලා ලුහුබඳිනු ලබන්නෙහුයැ'යි (පවසමින්) අනාවරණය කළෙමු.

وَاَوْحَيْنَاۤ اِلٰى مُوْسٰۤى اَنْ اَسْرِ بِعِبَادِىۡۤ اِنَّكُمْ مُّتَّبَعُوْنَ ﴿٥٣﴾

54. තවද ෆිර්අවුන් (මෙසේ පවසමින්) නගරවලට අඬබෙර කරුවන්ව යැවීය.

فَاَرْسَلَ فِرْعَوْنُ فِى الْمَدَآٮِٕنِ حٰشِرِيْنَ ﴿٥٤﴾

55. 'මොවුහු තුච්ඡ සුළු පිරිසක්මය'.

اِنَّ هٰۤؤُلَاۤءِ لَشِرْذِمَةٌ قَلِيْلُوْنَ ﴿٥٥﴾

56. 'තවද ඔවුන් අපව කෝපයට පත් කරන්නන්ම වෙති'.

وَاِنَّهُمْ لَنَا لَغَآٮِٕظُوْنَ ﴿٥٦﴾

57. 'තවද අපි සෝදිසියෙන් සිටින ජනකායක්ම වෙමු'.

وَاِنَّا لَجَمِيْعٌ حٰذِرُوْنَ ﴿٥٧﴾

58. එබැවින් අපි ඔවුන්ව උද්‍යානයන් සහ දිය උල්පත් වලින් (යුත් භූමියෙන්) බැහැර කළෙමු.

فَاَخْرَجْنٰهُمْ مِّنْ جَنّٰتٍ وَّعُيُوْنٍ ﴿٥٨﴾

59. තවද ධන සම්භාරයෙන්ද ගෞරවාන්විත වාසස්ථානයෙන්ද.

وَّكُنُوْزٍ وَّمَقَامٍ كَرِيْمٍ ﴿٥٩﴾

60. එලෙසම (වි)ය. තවද අපි ඒවා ඉස්රාඊලයේ දරුවන්ට උරුම කළෙමු.

كَذٰلِكَ ؕ وَاَوْرَثْنٰهَا بَنِىْۤ اِسْرَآءِيْلَ ﴿٦٠﴾

61. තවද ඔවුන් මොවුන්ව අරුණෝදයේදී ලුහුබැඳ ගියෝය.

فَاَتْبَعُوْهُمْ مُّشْرِقِيْنَ ﴿٦١﴾

62. තවද සේනා දෙක එකිනෙකාව දැකගත් විට මූසාගේ සගයින්, 'නියතවශයෙන්ම අපි වටලනු ලැබුවෙමු'යි පැවසූහ.

فَلَمَّا تَرَآءَ الْجَمْعٰنِ قَالَ اَصْحٰبُ مُوْسٰۤى اِنَّا لَمُدْرَكُوْنَ ﴿٦٢﴾

قَالَ كَلَّا ۖ إِنَّ مَعِيَ رَبِّي سَيَهْدِينِ ٦٣

63. 'කිසිසේත් නොව, සැබැවින්ම මාගේ අධිපතියාණන් මා සමගය. ඔහු මාහට නිසිමග පෙන්වන්නේමයැ'යි ඔහු කීවේය.

فَأَوْحَيْنَا إِلَىٰ مُوسَىٰ أَنِ اضْرِب بِّعَصَاكَ الْبَحْرَ ۖ فَانفَلَقَ فَكَانَ كُلُّ فِرْقٍ كَالطَّوْدِ الْعَظِيمِ ٦٤

64. එවිට අපි මූසා වෙත 'ඔබගේ සැරයටියෙන් මුහුදට ගසන්නැ'යි (පවසමින්) අනාවරණය කළෙමු. පසුව එය බෙදී ගියේය. තවද එහි සෑම කොටසක්ම විශාල පර්වතයක් බඳු (පෙනෙන්නට) විය.

وَأَزْلَفْنَا ثَمَّ الْآخَرِينَ ٦٥

65. තවද අපි අනෙක් අයවද එම ස්ථානයට සමීප වන්නට සැලැස්වූවෙමු.

وَأَنجَيْنَا مُوسَىٰ وَمَن مَّعَهُ أَجْمَعِينَ ٦٦

66. තවද අපි මූසා සහ ඔහු සමග සිටි සියලු අයව මුදවා ගත්තෙමු.

ثُمَّ أَغْرَقْنَا الْآخَرِينَ ٦٧

67. පසුව අපි අන් අයව ගිල්වා දැමුවෙමු.

إِنَّ فِي ذَٰلِكَ لَآيَةً ۖ وَمَا كَانَ أَكْثَرُهُم مُّؤْمِنِينَ ٦٨

68. මෙහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් මොවුන්ගෙන් බොහෝ අය විශ්වාස කරන්නන් නොවනු ඇත.

وَإِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيزُ الرَّحِيمُ ٦٩

69. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් වන ඔහු බලසම්පන්නය, පරම දයාබරය.

وَاتْلُ عَلَيْهِمْ نَبَأَ إِبْرَاهِيمَ ٧٠

70. තවද ඉබ්රාහිම්ගේ වෘතාන්තය ඔවුනට කියා දෙන්න.

إِذْ قَالَ لِأَبِيهِ وَقَوْمِهِ مَا تَعْبُدُونَ ٧١

71. 'නුඹලා කුමක් නමදින්නෙහුදැ?'යි ඔහු, තම පියාණන්ට සහ තම ජනතාවට කියූ කල්හි,

قَالُوا نَعْبُدُ أَصْنَامًا فَنَظَلُّ لَهَا عَاكِفِينَ ٧٢

72. ඔවුහු, 'අපි පිළිමයන්ට වඳින්නෙමු. තවද අපි ඒවාටම කැප වී සිටින්නෙමු'යි කීහ.

قَالَ هَلْ يَسْمَعُونَكُمْ إِذْ تَدْعُونَ ٧٣

73. ඔහු, 'නුඹලා (ඔවුන්ව) අඬගසන කල්හි, නුඹලාට ඇහුන්කම් දීමට ඒවාට හැකිදැ?'යි කීවේය.

اَوْ يَنْفَعُوْنَكُمْ اَوْ يَضُرُّوْنَ ۝٧٤

74. 'නුඹලාට යහපතක් හෝ හානියක් හෝ කිරීමට ඒවාට හැකිද?'

قَالُوْا بَلْ وَجَدْنَاۤ اٰبَآءَنَا كَذٰلِكَ يَفْعَلُوْنَ ۝٧٥

75. ඔවුහු, 'නොඑසේය, නමුත් අපගේ පියවරුන්ද එසේ කරනු අපි දැක ඇත්තෙමු'යි කීහ.

قَالَ اَفَرَءَيْتُمْ مَّا كُنْتُمْ تَعْبُدُوْنَ ۙ۝٧٦

76. ඔහු, 'නුඹලා වඳිමින් සිටි දේ කුමක්දැයි නුඹලා සිතා බැලුවෙහුදැ?'යි කීවේය.

اَنْتُمْ وَاٰبَآؤُكُمُ الْاَقْدَمُوْنَ ۝٧٧

77. 'නුඹලා මෙන්ම පෙර විසූ නුඹලාගේ පියවරුන් (සිතා බැලුවෙහු)ද'

فَاِنَّهُمْ عَدُوٌّ لِّيْۤ اِلَّا رَبَّ الْعٰلَمِيْنَ ۙ۝٧٨

78. 'සර්ව ලෝකයන්ටම අධිපතියාණන් හැර, ඔවුන් (සියල්ල) නියතවශයෙන් මා හට සතුරන්ය'.

الَّذِيْ خَلَقَنِيْ فَهُوَ يَهْدِيْنِ ۙ۝٧٩

79. 'ඔහු මා මැවුවේය. තවද ඔහුම මා හට මග පෙන්වන්නේය'.

وَالَّذِيْ هُوَ يُطْعِمُنِيْ وَيَسْقِيْنِ ۙ۝٨٠

80. 'තවද මා හට කවන්නේද මා හට පොවන්නේද ඔහුමය'.

وَاِذَا مَرِضْتُ فَهُوَ يَشْفِيْنِ ۙ۝٨١

81. 'තවද මා අසනීපවූ විටදී, මා හට සුවය ලබා දෙන්නේද ඔහුමය'.

وَالَّذِيْ يُمِيْتُنِيْ ثُمَّ يُحْيِيْنِ ۙ۝٨٢

82. 'තවද මා මරණයට පත් කරන්නේද, පසුව (නැවත) මා හට ජීවය දෙන්නේද ඔහුමය'.

وَالَّذِيْۤ اَطْمَعُ اَنْ يَّغْفِرَ لِيْ خَطِيْٓـَٔتِيْ يَوْمَ الدِّيْنِ ۝٨٣

83. 'තවද විනිශ්චය දිනයේදී මාගේ වැරදි ක්ෂමා කරන්නේ ඔහුම යැයි මම අපේක්ෂා කරමි'.

رَبِّ هَبْ لِيْ حُكْمًا وَّاَلْحِقْنِيْ بِالصّٰلِحِيْنَ ۙ۝٨٤

84. 'මාගේ අධිපතියාණෙනි! මා හට ප්‍රඥාව පිරිනමනු මැනව. තවද මාව ධාර්මිෂ්ඨකයින් සමග එක් කරනු මැනව'.

وَاجْعَلْ لِّيْ لِسَانَ صِدْقٍ فِي الْاٰخِرِيْنَ ۙ۝٨٥

85. 'තවද මතු පරපුර අතරෙහි මා හට සැබෑ කීර්තියද ලබා දෙනු මැනව'.

وَاجْعَلْنِىْ مِنْ وَّرَثَةِ جَنَّةِ النَّعِيْمِ ۙ﴿٨٦﴾

86. 'තවද මාව දිව්‍ය සැපතකින් යුත් උද්‍යානයේ උරුමක්කාරයින්ගෙන් (කෙනෙකු) කරනු මැනව'.

وَاغْفِرْ لِاَبِىْٓ اِنَّهٗ كَانَ مِنَ الضَّآلِّيْنَ ۙ﴿٨٧﴾

87. 'තවද මාගේ පියාවද ක්ෂමා කරනු මැනව. නියතවශයෙන්ම ඔහු නොමග ගියවුන්ගෙන් (කෙනෙක්)ය'.

وَلَا تُخْزِنِىْ يَوْمَ يُبْعَثُوْنَ ۙ﴿٨٨﴾

88. 'තවද ඔවුන් නැගිටවනු ලබන දිනයේදී මා අවමානයට පත් නොකරනු මැනව'.

يَوْمَ لَا يَنْفَعُ مَالٌ وَّلَا بَنُوْنَ ۙ﴿٨٩﴾

89. 'එම දිනයේ ධනයද පුතුන්ද ඵලක් නොවනු ඇත'.

اِلَّا مَنْ اَتَى اللّٰهَ بِقَلْبٍ سَلِيْمٍ ؕ﴿٩٠﴾

90. 'අවනත හදවතින් යුතුව අල්ලාහ් වෙත පැමිණෙන අය හැරෙන්නටය.

وَاُزْلِفَتِ الْجَنَّةُ لِلْمُتَّقِيْنَ ۙ﴿٩١﴾

91. තවද ස්වර්ගය බියබැතිමතුන් සමීපයට ගෙන එනු ලබන්නේය.

وَبُرِّزَتِ الْجَحِيْمُ لِلْغٰوِيْنَ ۙ﴿٩٢﴾

92. තවද නිරය නොමග ගිය අය ඉදිරියට ගෙන එනු ලබන්නේය.

وَقِيْلَ لَهُمْ اَيْنَمَا كُنْتُمْ تَعْبُدُوْنَ ۙ﴿٩٣﴾

93. තවද 'නුඹලා නැමදුම් කරමින් සිටි දේ කොහේද?'යි ඔවුනට පවසනු ලබන්නේය.

مِنْ دُوْنِ اللّٰهِ ؕ هَلْ يَنْصُرُوْنَكُمْ اَوْ يَنْتَصِرُوْنَ ؕ﴿٩٤﴾

94. 'අල්ලාහ් හැරය. නුඹලාට උදව් කිරීමට ඒවාට හැකිද? නැතහොත් ඒවාට (තමන්ටම) උදව් විය හැකිද?'

فَكُبْكِبُوْا فِيْهَا هُمْ وَالْغَاوٗنَ ۙ﴿٩٥﴾

95. එවිට ඔවුන්ද නොමග ගියවුන්ද එහි මූණින් අතට හෙළනු ලබන්නෝය.

وَجُنُوْدُ اِبْلِيْسَ اَجْمَعُوْنَ ؕ﴿٩٦﴾

96. තවද ඉබ්ලීස්ගේ සියළු සේනාවන්ද.

قَالُوْا وَهُمْ فِيْهَا يَخْتَصِمُوْنَ ۙ﴿٩٧﴾

97. එහිදී ඔවුන් අතර එකිනෙකා වාද කරමින් ඔවුන් (මෙසේ) කියනු ඇත.

تَاللّٰهِ اِنْ كُنَّا لَفِىْ ضَلٰلٍ مُّبِيْنٍۙ ﴿٩٨﴾

98. 'අල්ලාහ් සාක්කි, අපි ප්‍රකට නොමගෙහි සිටියෙමු'.

اِذْ نُسَوِّيْكُمْ بِرَبِّ الْعٰلَمِيْنَ ﴿٩٩﴾

99. 'අපි නුඹලාව සියළු ලෝකයන්හි අධිපතියාණන් සමග සමාන ලෙස සැලකූ විට'.

وَمَاۤ اَضَلَّنَاۤ اِلَّا الْمُجْرِمُوْنَ ﴿١٠٠﴾

100. 'තවද අපව නොමග යැව්වේ වරදකරුවන් මිස අන් කිසිවෙකු නොවේ'.

فَمَا لَنَا مِنْ شَافِعِيْنَۙ ﴿١٠١﴾

101. 'තවද දැන් අපට මැදිහත්කරුවන් කිසිවෙකු නොමැත'.

وَلَا صَدِيْقٍ حَمِيْمٍ ﴿١٠٢﴾

102. 'තවද කිසිම හිතවත් මිතුරෙකුද නොමැත'.

فَلَوْ اَنَّ لَنَا كَرَّةً فَنَكُوْنَ مِنَ الْمُؤْمِنِيْنَ ﴿١٠٣﴾

103. '(ලොවට) ආපසු යෑමට අපට අවස්ථාවක් ඇතොත් අපි විශ්වාසිතයින් අතුරින් වන්නෙමු!'

اِنَّ فِىْ ذٰلِكَ لَاٰيَةً ؕ وَمَا كَانَ اَكْثَرُهُمْ مُّؤْمِنِيْنَ ﴿١٠٤﴾

104. මෙහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් මොවුන්ගෙන් බොහෝ අය විශ්වාස කරන්නන් නොවූහ.

وَاِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيْزُ الرَّحِيْمُ ﴿١٠٥﴾

105. තවද සැබැවින්ම ඔබගේ අධිපතියාණන් ඔහුම බලසම්පන්නය, පරම දයාබරය.

كَذَّبَتْ قَوْمُ نُوْحِ ِۨالْمُرْسَلِيْنَ ﴿١٠٦﴾

106. නූහ්ගේ ජනතාව, දූතයින්ව මුසාවාදීන් ලෙස සැළකූහ.

اِذْ قَالَ لَهُمْ اَخُوْهُمْ نُوْحٌ اَلَا تَتَّقُوْنَ ﴿١٠٧﴾

107. ඔවුන්ගේ සොහොයුරා නූහ් ඔවුන් වෙත (මෙසේ) පැවසූ කල්හි, 'නුඹලා බිය බැතිමතුන් නොවන්නෙහුද?'

اِنِّىْ لَـكُمْ رَسُوْلٌ اَمِيْنٌ ۙ ﴿١٠٨﴾

108. 'නියතවශයෙන්ම මම නුඹලාට විශ්වාසනීය දූතයෙක් වෙමි'.

فَاتَّقُوا اللّٰهَ وَاَطِيْعُوْنِ ﴿١٠٩﴾

109. 'එබැවින් අල්ලාහ්ට බිය වනු. තවද මා හට අවනත වනු'.

وَمَاۤ اَسْـئَلُكُمْ عَلَيْهِ مِنْ اَجْرٍ ۚ اِنْ اَجْرِىَ اِلَّا عَلٰى رَبِّ الْعٰلَمِيْنَ ﴿١١٠﴾

110. 'තවද මේ සඳහා මම නුඹලාගෙන් ප්‍රතිලාභයක් නොඉල්ලමි. මාගේ තිළිණය සියළු ලෝකයන්හි අධිපතියාණන් වෙත පමණි'.

فَاتَّقُوا اللّٰهَ وَاَطِيْعُوْنِ ﴿١١١﴾

111. 'එබැවින් අල්ලාහ්ට බිය වනු. තවද මා හට අවනත වනු'.

قَالُوْٓا اَنُؤْمِنُ لَكَ وَاتَّبَعَكَ الْاَرْذَلُوْنَ ﴿١١٢﴾

112. 'ඔබව නිචයින් අනුගමනය කරත්දී අප ඔබව විශ්වාස කරන්නදැ?'යි ඔවුහු කීහ.

قَالَ وَمَا عِلْمِىْ بِمَا كَانُوْا يَعْمَلُوْنَ ﴿١١٣﴾

113. 'තවද ඔවුන් කරමින් සිටින දේ ගැන මට ඇත්තේ කුමන දැනුමක්දැ?'යි ඔහු කීවේය.

اِنْ حِسَابُهُمْ اِلَّا عَلٰى رَبِّىْ لَوْ تَشْعُرُوْنَ ﴿١١٤﴾

114. 'ඔවුන්ගේ ගණන් ගැනීම මාගේ අධිපතියාණන් වෙතමය. නුඹලා දන්නේ නම්!'

وَمَآ اَنَا بِطَارِدِ الْمُؤْمِنِيْنَ ﴿١١٥﴾

115. 'තවද මම විශ්වාසිතයින්ව පළවා හරින්නෙක් නොවෙමි'.

اِنْ اَنَا اِلَّا نَذِيْرٌ مُّبِيْنٌ ﴿١١٦﴾

116. 'මම පැහැදිලි අවවාදකරුවෙකු පමණි'.

قَالُوْا لَئِنْ لَّمْ تَنْتَهِ يٰنُوْحُ لَتَكُوْنَنَّ مِنَ الْمَرْجُوْمِيْنَ ﴿١١٧﴾

117. 'ඔබ වැළකී නොසිටින්නේ නම්, එම්බා නූහ්! ඔබ නියතවශයෙන්ම ගල් ගැසීමේ දඬුවම ලැබූවන්ගෙන් කෙනෙකු වන්නෙහියැ'යි ඔවුහු කීහ.

قَالَ رَبِّ اِنَّ قَوْمِىْ كَذَّبُوْنِ ﴿١١٨﴾

118. 'මාගේ අධිපතියාණෙනි! මාගේ ජනතාව මාව මුසාවාදියෙකු ලෙස සළකා ඇතැ'යි ඔහු කීවේය.

فَافْتَحْ بَيْنِىْ وَبَيْنَهُمْ فَتْحًا وَّنَجِّنِىْ وَمَنْ مَّعِىَ مِنَ الْمُؤْمِنِيْنَ ﴿١١٩﴾

119. 'එබැවින් මා සහ ඔවුන් අතර ඔබ තීරණාත්මක විනිශ්චය දෙනු මැනව. තවද මාවද මා සමග වන විශ්වාසිතයින්වද මුදවා ගනු මැනව'.

فَاَنْجَيْنٰهُ وَمَنْ مَّعَهٗ فِى الْفُلْكِ الْمَشْحُوْنِ ﴿١٢٠﴾

120. එබැවින් අපි ඔහුවද ඔහු සමග සිටි අයවද පටවන ලද නැවකින් මුදවා ගත්තෙමු.

ثُمَّ اَغْرَقْنَا بَعْدُ الْبٰقِيْنَ ﴿١٢١﴾

121. පසුව අපි ඉතුරුවූවන්ව ගිල්වා දැමුවෙමු.

اِنَّ فِىْ ذٰلِكَ لَاٰيَةً ۗ وَمَا كَانَ اَكْثَرُهُمْ

122. මෙහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් මොවුන්ගෙන් බොහෝ

مُّؤْمِنِينَ ﴿١٢٢﴾

අය විශ්වාස කරන්නන් නොවූහ.

وَإِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيزُ الرَّحِيمُ ﴿١٢٣﴾

123. තවද නියතවශයෙන් ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

كَذَّبَتْ عَادٌ الْمُرْسَلِينَ ﴿١٢٤﴾

124. ආද් (සමූහයද) දූතයින්ව ප්‍රතික්ෂේප කළහ.

إِذْ قَالَ لَهُمْ أَخُوهُمْ هُودٌ أَلَا تَتَّقُونَ ﴿١٢٥﴾

125. ඔවුන්ගේ සොහොයුරා හූද් ඔවුනට (මෙසේ) පැවසූ විට, 'නුඹලා බියබැතිමත් නොවන්නෙහුද?'

إِنِّي لَكُمْ رَسُولٌ أَمِينٌ ﴿١٢٦﴾

126. 'නියතවශයෙන්ම මම නුඹලාට ඉතා විශ්වාසනීය දූතයෙක් වෙමි'.

فَاتَّقُوا اللَّهَ وَأَطِيعُونِ ﴿١٢٧﴾

127. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

وَمَا أَسْأَلُكُمْ عَلَيْهِ مِنْ أَجْرٍ ۖ إِنْ أَجْرِيَ إِلَّا عَلَىٰ رَبِّ الْعَالَمِينَ ﴿١٢٨﴾

128. 'තවද මම මේ සඳහා නුඹලාගෙන් ප්‍රතිලාභයක් නොඉල්ලමි. මාගේ තිළිණය සියළු ලෝකයන්හි අධිපතියාණන් වෙත පමණි'.

أَتَبْنُونَ بِكُلِّ رِيعٍ آيَةً تَعْبَثُونَ ﴿١٢٩﴾

129. 'පුහු කීර්තිය පතා සෑම උස් තැනකම නුඹලා ස්මාරකයන් තනන්නෙහුද'?

وَتَتَّخِذُونَ مَصَانِعَ لَعَلَّكُمْ تَخْلُدُونَ ﴿١٣٠﴾

130. 'එමෙන්ම නුඹලා දිගුකල් වෙසෙන්නට විශාල බලකොටු සහ කර්මාන්ත ඉදි කරන්නෙහුද?'.

وَإِذَا بَطَشْتُمْ بَطَشْتُمْ جَبَّارِينَ ﴿١٣١﴾

131. 'තවද නුඹලා ආක්‍රමණය කරන විට, නුඹලා කෲර පාලකයින් ලෙස ආක්‍රමණය කරන්නෙහුය'.

فَاتَّقُوا اللَّهَ وَأَطِيعُونِ ﴿١٣٢﴾

132. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

وَاتَّقُوا الَّذِي أَمَدَّكُمْ بِمَا تَعْلَمُونَ ﴿١٣٣﴾

133. 'තවද නුඹලා දන්නා සියළු දේවල් සඳහා නුඹලාට උදව් කළ ඔහු කෙරෙහි බියබැතිමත් වනු'.

134. 'ඔහු ගවසතුන් සහ පුතුන් මගින් නුඹලාට උදව් කර ඇත'.

اَمَدَّكُمْ بِاَنْعَامٍ وَّبَنِيْنَ ۙ﴿١٣٤﴾

135. 'එමෙන්ම උයන් සහ දිය උල්පත් වලින්ද'.

وَجَنّٰتٍ وَّعُيُوْنٍ ۚ﴿١٣٥﴾

136. 'ඇත්තෙන්ම නුඹලා කෙරෙහි වූ අතිමහත් වූ දිනයෙහි දඬුවමට මම බියවන්නෙමි'.

اِنِّيْۤ اَخَافُ عَلَيْكُمْ عَذَابَ يَوْمٍ عَظِيْمٍ ؕ﴿١٣٦﴾

137. ඔවුන්, 'ඔබ අපට අනුශාසනා කළද ඔබ අනුශාසකයින්ගෙන් කෙනෙකු නොවුවද අපට එක සමානයැ'යි පැවසූහ.

قَالُوْا سَوَآءٌ عَلَيْنَاۤ اَوَعَظْتَ اَمْ لَمْ تَكُنْ مِّنَ الْوٰعِظِيْنَ ۙ﴿١٣٧﴾

138. 'මෙය පැරැන්නන්ගේ පුරුද්දක් මිස අන් කිසිවක් නොවේ'.

اِنْ هٰذَاۤ اِلَّا خُلُقُ الْاَوَّلِيْنَ ۙ﴿١٣٨﴾

139. 'තවද අපි දඬුවම් කරනු නොලබන්නෙමු' (යැයිද පැවසූහ).

وَمَا نَحْنُ بِمُعَذَّبِيْنَ ۚ﴿١٣٩﴾

140. එබැවින් ඔවුන් ඔහුව ප්‍රතික්ෂේප කළහ. එමනිසා අපි ඔවුන්ව විනාශ කළෙමු. එහි ඇත්තෙන්ම සළකුණක් ඇත. නමුත් ඔවුන්ගෙන් වැඩි පිරිසක් විශ්වාස කරන්නන් නොවෙති.

فَكَذَّبُوْهُ فَاَهْلَكْنٰهُمْ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيَةً ؕ وَمَا كَانَ اَكْثَرُهُمْ مُّؤْمِنِيْنَ ﴿١٤٠﴾

141. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

وَاِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيْزُ الرَّحِيْمُ ﴿١٤١﴾ ع

142. සමූද් (සමූහයද) දූතයින්ව ප්‍රතික්ෂේප කළහ.

كَذَّبَتْ ثَمُوْدُ الْمُرْسَلِيْنَ ۚ﴿١٤٢﴾

143. ඔවුන්ගේ සොහොයුරා සාලිහ් ඔවුනට (මෙසේ) පැවසූ විට, 'නුඹලා බියබැතිමත් නොවන්නෙහුද?'

اِذْ قَالَ لَهُمْ اَخُوْهُمْ صٰلِحٌ اَلَا تَتَّقُوْنَ ۚ﴿١٤٣﴾

144. 'නියතවශයෙන්ම මම නුඹලාට ඉතා විශ්වාසනීය දූතයෙක් වෙමි'.

اِنِّيْ لَكُمْ رَسُوْلٌ اَمِيْنٌ ۙ﴿١٤٤﴾

145. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

فَاتَّقُوا اللّٰهَ وَاَطِيْعُوْنِ ۚ﴿١٤٥﴾

وَمَآ اَسۡـَٔلُكُمۡ عَلَيۡهِ مِنۡ اَجۡرٍ‌ ۚ اِنۡ اَجۡرِىَ اِلَّا عَلٰى رَبِّ الۡعٰلَمِيۡنَ ؕ‏ ﴿١٤٦﴾

146. 'තවද මම මේ සඳහා නුඹලාගෙන් ප්‍රතිලාභයක් නොඉල්ලමි. මාගේ තිළිණය සියළු ලෝකයන්හි අධිපතියාණන් වෙත පමණි'.

اَتُتۡرَكُوۡنَ فِىۡ مَا هٰهُنَاۤ اٰمِنِيۡنَۙ‏ ﴿١٤٧﴾

147. 'නුඹලා මෙයාකාරයට මෙහි සුරක්ෂිතව සිටින්නන් සේ හරිනු ලබන්නෙහුද?'

فِىۡ جَنّٰتٍ وَّعُيُوۡنٍۙ‏ ﴿١٤٨﴾

148. 'එමෙන්ම උයන් සහ දිය උල්පත්හිද'.

وَّزُرُوۡعٍ وَّنَخۡلٍ طَلۡعُهَا هَضِيۡمٌ‌ۚ‏ ﴿١٤٩﴾

149. 'එමෙන්ම ධාන්‍ය කෙත්හිද කඩා වැටීමට ආසන්නව බරවු පොකුරු සහිත රටඉඳි ගස්හිද'.

وَتَنۡحِتُوۡنَ مِنَ الۡجِبَالِ بُيُوۡتًا فٰرِهِيۡنَ‌ۚ‏ ﴿١٥٠﴾

150. 'තවද නුඹලා මහත් නිපුණත්වයෙන් යුතුව කඳු කොටා ගෙවල් තනන්නෙහුය'.

فَاتَّقُوا اللّٰهَ وَاَطِيۡعُوۡنِ‌ۚ‏ ﴿١٥١﴾

151. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

وَلَا تُطِيۡعُوۡۤا اَمۡرَ الۡمُسۡرِفِيۡنَۙ‏ ﴿١٥٢﴾

152. 'තවද සීමාව ඉක්මවන්නන්ගේ අණට අවනත නොවනු'.

الَّذِيۡنَ يُفۡسِدُوۡنَ فِى الۡاَرۡضِ وَلَا يُصۡلِحُوۡنَ‏ ﴿١٥٣﴾

153. 'ඔවුහු පොළොවෙහි කලබල ඇති කරති. තවද සංශෝධනය නොකරති'.

قَالُوۡۤا اِنَّمَاۤ اَنۡتَ مِنَ الۡمُسَحَّرِيۡنَ‌ۚ‏ ﴿١٥٤﴾

154. ඔවුන්, 'ඔබ මෝහනය කරනු ලැබුවෙක්යැ'යි පැවසුහ.

مَاۤ اَنۡتَ اِلَّا بَشَرٌ مِّثۡلُنَا ‌ۖۚ فَاۡتِ بِاٰيَةٍ اِنۡ كُنۡتَ مِنَ الصّٰدِقِيۡنَ‏ ﴿١٥٥﴾

155. 'ඔබද අප වැනි මිනිසෙකු පමණි. එබැවින් ඔබ සත්‍යවාදීන්ගෙන් (කෙනෙක්) වේ නම් සළකුණක් ගෙන එන්න' (යැයිද පැවසුහ).

قَالَ هٰذِهٖ نَاقَةٌ لَّهَا شِرۡبٌ وَّلَكُمۡ شِرۡبُ يَوۡمٍ مَّعۡلُوۡمٍ‌ۚ‏ ﴿١٥٦﴾

156. ඔහු (මෙසේ) පැවසුවේය. 'මැය ඔටු දෙනකි. මැයට (තම) ජලය පානය කිරීමේ වාරය තිබේ. එමෙන්ම නුඹලාටද නියමිත දිනයේ ජලයේ පානය කිරීමේ (නුඹලාගේ) වාරය තිබේ'.

157. 'තවද හිරිහැර කරනු පිණිස ඌව නොඅල්ලනු. නැතහොත් අති මහත් වූ දිනයක දඬුවමක් නුඹලාව හසු කර ගනු ඇත'.

وَلَا تَمَسُّوهَا بِسُوٓءٍ فَيَأْخُذَكُمْ عَذَابُ يَوْمٍ عَظِيمٍ ﴿١٥٧﴾

158. නමුත් ඔවුන් උගේ කලවේ නහරයන් කපා දැමූහ. පසුව ඔවුන් පසුතැවිල්ලට පත්වූහ.

فَعَقَرُوهَا فَأَصْبَحُوا نَٰدِمِينَ ﴿١٥٨﴾

159. එබැවින් දඬුවම ඔවුන්ව හසු කරගත්තේය. එහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් ඔවුන්ගෙන් වැඩි පිරිසක් විශ්වාස කරන්නන් නොවෙති.

فَأَخَذَهُمُ ٱلْعَذَابُ ۗ إِنَّ فِى ذَٰلِكَ لَءَايَةً ۖ وَمَا كَانَ أَكْثَرُهُم مُّؤْمِنِينَ ﴿١٥٩﴾

160. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

وَإِنَّ رَبَّكَ لَهُوَ ٱلْعَزِيزُ ٱلرَّحِيمُ ﴿١٦٠﴾

161. ලූත්ගේ ජනතාවද දූතයින්ව ප්‍රතික්ෂේප කළහ.

كَذَّبَتْ قَوْمُ لُوطٍ ٱلْمُرْسَلِينَ ﴿١٦١﴾

162. ඔවුන්ගේ සොහොයුරා ලූත් ඔවුන් වෙත (මෙසේ) පැවසූ විට, 'නුඹලා බියබැතිමත් නොවන්නෙහුද?'

إِذْ قَالَ لَهُمْ أَخُوهُمْ لُوطٌ أَلَا تَتَّقُونَ ﴿١٦٢﴾

163. 'නියතවශයෙන්ම මම නුඹලාට ඉතා විශ්වාසනීය දූතයෙක් වෙමි'.

إِنِّى لَكُمْ رَسُولٌ أَمِينٌ ﴿١٦٣﴾

164. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

فَٱتَّقُوا ٱللَّهَ وَأَطِيعُونِ ﴿١٦٤﴾

165. 'තවද මම මේ සඳහා නුඹලාගෙන් ප්‍රතිලාභයක් නොඉල්ලමි. මාගේ තිළිණය සියළු ලෝකයන්හි අධිපතියාණන් වෙත පමණි'.

وَمَآ أَسْـَٔلُكُمْ عَلَيْهِ مِنْ أَجْرٍ ۖ إِنْ أَجْرِىَ إِلَّا عَلَىٰ رَبِّ ٱلْعَٰلَمِينَ ﴿١٦٥﴾

166. 'නුඹලා සියළු ලෝ වැසියන්ගෙන් පුරුෂයින් කරා ළං වන්නෙහුද?'.

أَتَأْتُونَ ٱلذُّكْرَانَ مِنَ ٱلْعَٰلَمِينَ ﴿١٦٦﴾

167. 'තවද නුඹලා සඳහා නුඹලාගේ අධිපතියාණන් මවා ඇති නුඹලාගේ භාර්යයාවන්ව අත් හරින්නෙහුද? එපමණක්ද නොව නුඹලා සීමාව ඉක්මවන ජනතාවකි'.

وَتَذَرُونَ مَا خَلَقَ لَكُمْ رَبُّكُم مِّنْ أَزْوَٰجِكُم ۚ بَلْ أَنتُمْ قَوْمٌ عَادُونَ ﴿١٦٧﴾

قَالُوا لَئِن لَّمْ تَنتَهِ يَٰلُوطُ لَتَكُونَنَّ مِنَ الْمُخْرَجِينَ ﴿١٦٨﴾

168. ඔවුහු, 'ඔබ වැළකී නොසිටියේ නම්, එම්බා ලූත්! නියතවශයෙන් ඔබ පිටුවහල් කරන ලද්දන්ගෙන් (කෙනෙකු) වන්නේම යැ'යි කීහ.

قَالَ إِنِّي لِعَمَلِكُم مِّنَ الْقَالِينَ ﴿١٦٩﴾

169. ඔහු, 'නියතවශයෙන්ම මම නුඹලාගේ (නපුරු) ක්‍රියාව පිළිකුල් කරන්නෙමි'යි කීවේය.

رَبِّ نَجِّنِي وَأَهْلِي مِمَّا يَعْمَلُونَ ﴿١٧٠﴾

170. 'මාගේ අධිපතියාණෙනි! මාවද මාගේ පවුලේ අයවද ඔවුන් කරන දෙයින් ආරක්‍ෂා කරනු මැනව'.

فَنَجَّيْنَٰهُ وَأَهْلَهُۥٓ أَجْمَعِينَ ﴿١٧١﴾

171. එබැවින් අපි, ඔහුවද ඔහුගේ පවුලේ අය සියල්ලවද ආරක්ෂා කළෙමු.

إِلَّا عَجُوزًا فِي الْغَٰبِرِينَ ﴿١٧٢﴾

172. පසුබට වූවන් අතුරින් මහළු ස්ත්‍රියක් හැරය,

ثُمَّ دَمَّرْنَا الْآخَرِينَ ﴿١٧٣﴾

173. පසුව අපි අන් අයව විනාශ කළෙමු.

وَأَمْطَرْنَا عَلَيْهِم مَّطَرًا ۖ فَسَآءَ مَطَرُ الْمُنذَرِينَ ﴿١٧٤﴾

174. තවද අපි ඔවුන් මත වර්ෂාවක් වැස්සුවෙමු. තවද අවවාද කරනු ලැබූවන් කෙරෙහි පතිත වන වර්ෂාව ඉතා නපුරුය.

إِنَّ فِي ذَٰلِكَ لَءَايَةً ۖ وَمَا كَانَ أَكْثَرُهُم مُّؤْمِنِينَ ﴿١٧٥﴾

175. එහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් මොවුන්ගෙන් බොහෝ අය විශ්වාස කරනන්නන් නොවූහ.

وَإِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيزُ الرَّحِيمُ ﴿١٧٦﴾

176. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

كَذَّبَ أَصْحَٰبُ لْـَٔيْكَةِ الْمُرْسَلِينَ ﴿١٧٧﴾

177. අයිකා (ඝන වෘක්ෂ ආශ්‍රිත) වාසීන්ද දූතයින්ව ප්‍රතික්ෂේප කළහ.

إِذْ قَالَ لَهُمْ شُعَيْبٌ أَلَا تَتَّقُونَ ﴿١٧٨﴾

178. ෂුඅයිබ් ඔවුන් වෙත (මෙසේ) පැවසූ විට, 'නුඹලා බිය බැතිමත් නොවන්නෙහුද?'

إِنِّي لَكُمْ رَسُولٌ أَمِينٌ ﴿١٧٩﴾

179. 'නියතවශයෙන්ම මම නුඹලාට ඉතා විශ්වාසනීය දූතයෙක් වෙමි'.

فَاتَّقُوا اللّٰهَ وَاَطِيۡعُوۡنِ ۚ ﴿١٨٠﴾

180. 'එබැවින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

وَمَاۤ اَسۡـَٔلُكُمۡ عَلَيۡهِ مِنۡ اَجۡرٍ ۚ اِنۡ اَجۡرِىَ اِلَّا عَلٰى رَبِّ الۡعٰلَمِيۡنَ ؕ ﴿١٨١﴾

181. 'තවද මම මේ සඳහා නුඹලාගෙන් ප්‍රතිලාභයක් නොඉල්ලමි. මාගේ තිළිණය සියළු ලෝකයන්හි අධිපතියාණන් වෙත පමණි'.

اَوۡفُوا الۡكَيۡلَ وَلَا تَكُوۡنُوۡا مِنَ الۡمُخۡسِرِيۡنَ ۚ ﴿١٨٢﴾

182. 'මිනුම සම්පූර්ණ කර දෙනු. තවද අඩුවෙන් දෙන අයගෙන් නොවනු'.

وَزِنُوۡا بِالۡقِسۡطَاسِ الۡمُسۡتَقِيۡمِ ۚ ﴿١٨٣﴾

183. 'තවද නිවැරදි තුලාවකින් කිරා දෙනු'.

وَلَا تَبۡخَسُوا النَّاسَ اَشۡيَآءَهُمۡ وَلَا تَعۡثَوۡا فِى الۡاَرۡضِ مُفۡسِدِيۡنَ ۚ ﴿١٨٤﴾

184. 'තවද මිනිසුන්ට, ඔවුන්ගේ භාණ්ඩයන් අඩු කර නොදෙනු. තවද පොළොවෙහි දූෂිතව හැසිරෙමින් කලබල ඇති කරන්නන් නොවනු'.

وَاتَّقُوا الَّذِىۡ خَلَقَكُمۡ وَالۡجِبِلَّةَ الۡاَوَّلِيۡنَ ؕ ﴿١٨٥﴾

185. 'එමෙන්ම නුඹලාවද පෙර වූ මැව්මිද මැවූ ඔහු කෙරෙහි බියබැතිමත් වනු'.

قَالُوۡۤا اِنَّمَاۤ اَنۡتَ مِنَ الۡمُسَحَّرِيۡنَ ۙ ﴿١٨٦﴾

186. ඔවුන් (මෙසේ) පැවසූහ, 'ඔබ මෝහනය කරනු ලැබූවෙක්ය'.

وَمَاۤ اَنۡتَ اِلَّا بَشَرٌ مِّثۡلُنَا وَاِنۡ نَّظُنُّكَ لَمِنَ الۡكٰذِبِيۡنَ ۚ ﴿١٨٧﴾

187. 'තවද ඔබ අප මෙන් මිනිසෙකු පමණි. තවද අපි ඔබව මුසාවාදීන්ගෙන් (කෙනෙකු) ලෙස අනුමාන කරන්නෙමු'.

فَاَسۡقِطۡ عَلَيۡنَا كِسَفًا مِّنَ السَّمَآءِ اِنۡ كُنۡتَ مِنَ الصّٰدِقِيۡنَ ؕ ﴿١٨٨﴾

188. 'එබැවින්, ඔබ සත්‍යවාදීන්ගෙන් (කෙනෙක්) වේ නම්, අහසින් ඇතැම් කැබැලි අප මත වැටෙන්නට සලස්වන්න'(යැයිද පැවසූහ).

قَالَ رَبِّىۡۤ اَعۡلَمُ بِمَا تَعۡمَلُوۡنَ ﴿١٨٩﴾

189. ඔහු, 'මාගේ අධිපතියාණන් නුඹලා කරන දේ මැනැවින් දන්නේ යැ'යි කීවේය.

فَكَذَّبُوۡهُ فَاَخَذَهُمۡ عَذَابُ يَوۡمِ

190. එබැවින් ඔවුහු මුසාවාදියෙකු ලෙස ඔහුව සැළකූහ. පසුව, අඳුරැ

الظُّلَّةِ ۚ إِنَّهُ كَانَ عَذَابَ يَوْمٍ عَظِيمٍ ١٩٠

සෙවනැල්ල පතුරුවන දිනයක දඬුවම ඔවුන්ව හසු කළේය. එය ඇත්තෙන්ම බිහිසුණු දිනයක දඬුවමක් විය.

إِنَّ فِي ذَٰلِكَ لَآيَةً ۖ وَمَا كَانَ أَكْثَرُهُمْ مُؤْمِنِينَ ١٩١

191. එහි සැබැවින්ම සළකුණක් ඇත. නමුත් මොවුන්ගෙන් බොහෝ අය විශ්වාස කරනන්නන් නොවූහ.

وَإِنَّ رَبَّكَ لَهُوَ الْعَزِيزُ الرَّحِيمُ ١٩٢

192. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ම බලසම්පන්නය, පරම දයාබරය.

وَإِنَّهُ لَتَنْزِيلُ رَبِّ الْعَالَمِينَ ١٩٣

193. තවද සැබැවින්ම මෙය සර්ව ලෝකයන්හි අධිපතියාණන් වෙතින් පහළ කරන ලද්දකි.

نَزَلَ بِهِ الرُّوحُ الْأَمِينُ ١٩٤

194. විශ්වාසනීය ආත්මය මෙය රැගෙන පහළ වී ඇත.

عَلَىٰ قَلْبِكَ لِتَكُونَ مِنَ الْمُنْذِرِينَ ١٩٥

195. ඔබගේ හදවත කෙරෙහි, ඔබ අවවාදකරුවන්ගෙන් වනු පිණිසය.

بِلِسَانٍ عَرَبِيٍّ مُبِينٍ ١٩٦

196. ඉතා පැහැදිලි වූ අරාබි බසින්ය.

وَإِنَّهُ لَفِي زُبُرِ الْأَوَّلِينَ ١٩٧

197. තවද නියතවශයෙන්ම මෙය පෙර සිටි ජනතාවන්ගේ ලියවිලි වලද (සඳහන් වී ඇත්තේ)ය.

أَوَلَمْ يَكُنْ لَهُمْ آيَةً أَنْ يَعْلَمَهُ عُلَمَاءُ بَنِي إِسْرَائِيلَ ١٩٨

198. තවද ඉස්රාඊලයේ දරුවන් අතර වන උගතුන් මෙය දැන සිටීම ඔවුන්ට එය සළකුණක් නොවේද?

وَلَوْ نَزَّلْنَاهُ عَلَىٰ بَعْضِ الْأَعْجَمِينَ ١٩٩

199. තවද අපි එය අරාබි නොවන කෙනෙකුට පහළ කළේ නම්,

فَقَرَأَهُ عَلَيْهِمْ مَا كَانُوا بِهِ مُؤْمِنِينَ ٢٠٠

200. තවද ඔහු ඔවුනට එය කියා දැක්වුවද ඔවුන් කිසිවිටෙකත් එය කෙරෙහි විශ්වාස කරන්නන් නොවනු ඇත.

كَذَٰلِكَ سَلَكْنَاهُ فِي قُلُوبِ الْمُجْرِمِينَ ٢٠١

201. මෙලෙසම අපි වරද කරුවන්ගේ හදවත් තුලට එය (අවිශ්වාසය) ප්‍රවේශ වීමට සැලැස්වූවෙමු.

لَا يُؤْمِنُونَ بِهِ حَتَّىٰ يَرَوُا الْعَذَابَ الْأَلِيمَ ۝٢٠٢

202. ඔවුන් වේදනීය දඬුවම දකින තුරු ඔවුන් එය කෙරෙහි විශ්වාස නොකරන්නෝය.

فَيَأْتِيَهُم بَغْتَةً وَهُمْ لَا يَشْعُرُونَ ۝٢٠٣

203. නමුත් ඔවුන් නොදැනුවත්ව සිටියදීම එය ඔවුන් වෙත සැනකින්ම පැමිණෙනු ඇත.

فَيَقُولُوا هَلْ نَحْنُ مُنظَرُونَ ۝٢٠٤

204. එවිට ඔවුන්, 'අපට කාල අවකාශය දෙනු ලබන්නේදැ?'යි කියනු ඇත.

أَفَبِعَذَابِنَا يَسْتَعْجِلُونَ ۝٢٠٥

205. කිමද! ඔවුන් අපගේ දඬුවම ඉක්මන් වීමට පතන්නෝද?

أَفَرَأَيْتَ إِن مَّتَّعْنَاهُمْ سِنِينَ ۝٢٠٦

206. ඔබ කුමක් සිතන්නෙහිද? අප ඔවුන්ට (මෙලොවෙහි යහපත් දෙවල්) වසර ගණන් භුක්ති විඳීමට ඉඩ හැරියේ නම්,

ثُمَّ جَاءَهُم مَّا كَانُوا يُوعَدُونَ ۝٢٠٧

207. පසුව ඔවුනට බියගන්වනු ලැබූ දේ ඔවුන් වෙත පැමිණි විට,

مَا أَغْنَىٰ عَنْهُم مَّا كَانُوا يُمَتَّعُونَ ۝٢٠٨

208. ඔවුනට භුක්ති විඳීමට ඉඩ හරින ලද දේ ඔවුන්හට කිසිදු ඵලක් අත් නොවනු ඇත.

معانقة ٩ عند المتقدمين

وَمَا أَهْلَكْنَا مِن قَرْيَةٍ إِلَّا لَهَا مُنذِرُونَ ۝٢٠٩

209. තවද අපි අවවාදකරුවන් නොසිටි කිසිදු නගරයක් විනාශ නොකළෙමු.

ذِكْرَىٰ وَمَا كُنَّا ظَالِمِينَ ۝٢١٠

210. (මෙය) අනුශාසනාවකි. තවද අපි අසාධාරණ කරන්නන් නොවෙමු.

وَمَا تَنَزَّلَتْ بِهِ الشَّيَاطِينُ ۝٢١١

211. තවද ෂෙයිතානුන් මෙය පහළ කළේ නැත.

وَمَا يَنبَغِي لَهُمْ وَمَا يَسْتَطِيعُونَ ۝٢١٢

212. ඔවුන් එයට සුදුස්සන්ද නොවේ. තවද (එසේ කිරීමට) ඔවුන්ට හැකියාවද නොමැත.

إِنَّهُمْ عَنِ السَّمْعِ لَمَعْزُولُونَ ۝٢١٣

213. නියතවශයෙන්ම ඔවුන් ඇසීමෙන් වළක්වනු ලැබූවන්ය.

فَلَا تَدْعُ مَعَ اللَّهِ إِلَٰهًا آخَرَ فَتَكُونَ

214. එබැවින් අල්ලාහ් සමග අන්

مِنَ الْمُعَذَّبِينَ ۝٢١٤

කිසිදු දෙවියෙකුව නොකැඳවන්න. නැතහොත් ඔබද දඬුවම් දෙනු ලබන්නන්ගෙන් කෙනෙක් වනු ඇත.

وَأَنذِرْ عَشِيرَتَكَ الْأَقْرَبِينَ ۝٢١٥

215. තවද ඔබගේ සමීප ඥාතීන්ට අවවාද කරන්න.

وَاخْفِضْ جَنَاحَكَ لِمَنِ اتَّبَعَكَ مِنَ الْمُؤْمِنِينَ ۝٢١٦

216. තවද ඔබව අනුගමනය කරන විශ්වාසිතයින්හට ඔබගේ (දයාවේ) පියාපත පහත් කරන්න.

فَإِنْ عَصَوْكَ فَقُلْ إِنِّي بَرِيءٌ مِّمَّا تَعْمَلُونَ ۝٢١٧

217. පසුව ඔවුන් ඔබට අකීකරු වුවහොත්, 'නුඹලා කරන දේ සම්බන්ධයෙන් මා නිදොස් වෙමි'යි පවසන්න.

وَتَوَكَّلْ عَلَى الْعَزِيزِ الرَّحِيمِ ۝٢١٨

218. තවද බලසම්පන්න මෙන්ම පරම දයාබර (දෙවියන්) කෙරෙහි ඔබගේ විශ්වාසය තබන්න.

الَّذِي يَرَاكَ حِينَ تَقُومُ ۝٢١٩

219. ඔබ (නැමදුම් සඳහා) සිටගන්නා විට ඔබව දකින්නේ ඔහුය.

وَتَقَلُّبَكَ فِي السَّاجِدِينَ ۝٢٢٠

220. තවද (දෙවියන් ඉදිරියෙහි) දණ්ඩ නමස්කාරය කරන්නන් අතර ඔබගේ ඉරියව්ද (දකින්නේ ඔහුමය).

إِنَّهُ هُوَ السَّمِيعُ الْعَلِيمُ ۝٢٢١

221. නියතවශයෙන්ම සියල්ල අසන්නාද සියල්ල දත්තාද ඔහුමය.

هَلْ أُنَبِّئُكُمْ عَلَىٰ مَن تَنَزَّلُ الشَّيَاطِينُ ۝٢٢٢

222. ෂෙයිතානුන් පහළ වන්නේ කවුරුන් මත දැයි මම නුඹලාට දන්වන්නද?

تَنَزَّلُ عَلَىٰ كُلِّ أَفَّاكٍ أَثِيمٍ ۝٢٢٣

223. මහා මුසාවාදී (මෙන්ම) පාපකාරී සියල්ලන් මත ඔවුන් පහළ වෙති.

يُلْقُونَ السَّمْعَ وَأَكْثَرُهُمْ كَاذِبُونَ ۝٢٢٤

224. ඔවුන් අසන දේ පතුරුවන්නෝය. තවද ඔවුන්ගෙන් බොහෝ අය මුසාවාදීන්ය.

وَالشُّعَرَاءُ يَتَّبِعُهُمُ الْغَاوُونَ ۝٢٢٥

225. තවද කවියන් (ගත් කළ) ඔවුන්ව අනුගමනය කරන්නේ නොමග යන්නන්ය.

اَلَمۡ تَرَ اَنَّهُمۡ فِىۡ كُلِّ وَادٍ يَّهِيۡمُوۡنَ ۝٢٢٦

226. ඔවුන් කෙසේ සෑම මිටියාවත්හි වල්මත්ව අයාලේ යන්නේ දැයි ඔබ නොදකින්නෙහිද?

وَاَنَّهُمۡ يَقُوۡلُوۡنَ مَا لَا يَفۡعَلُوۡنَ ۝٢٢٧

227. එමෙන්ම ඔවුන් තමන් නොකරන දේ පවසන්නෝය.

اِلَّا الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ وَذَكَرُوا اللّٰهَ كَثِيۡرًا وَّانۡتَصَرُوۡا مِنۡۢ بَعۡدِ مَا ظُلِمُوۡا ؕ وَسَيَعۡلَمُ الَّذِيۡنَ ظَلَمُوۡۤا اَىَّ مُنۡقَلَبٍ يَّنۡقَلِبُوۡنَ ۝٢٢٨

228. විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කර තවද අල්ලාහ්ව බොහෝ සෙයින් සිහිපත් කර තමන්ට අසාධාරණය කරනු ලැබූ විට (පමණක්) ප්‍රතිචාරය දක්වන අය හැරෙන්නටය. තවද අසාධාරණය කරන්නන් තමන් ආපසු යා යුතු ස්ථානය කවරක්දැයි ඉක්මණින්ම දැන ගන්නෝය.



අල් නම්ල්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

طٰسٓ تِلْكَ اٰيٰتُ الْقُرْاٰنِ وَكِتَابٍ مُّبِيْنٍ ②

2. තා, සීන්, ◆. මේවා කුර්ආනයේ සහ ආලෝකමත් ග්‍රන්ථයේ වාක්‍යයන් වේ.

هُدًى وَّبُشْرٰى لِلْمُؤْمِنِيْنَ ③

3. විශ්වාස කරන්නන් හට මග පෙන්වීමක්ද, ශුභාරංචියක්ද වේ.

الَّذِيْنَ يُقِيْمُوْنَ الصَّلٰوةَ وَيُؤْتُوْنَ الزَّكٰوةَ وَهُمْ بِالْاٰخِرَةِ هُمْ يُوْقِنُوْنَ ④

4. ඔවුන් නැමදුමෙහි නිරත වන්නන්ද (zසකාත්)දුගීබද්ද ගෙවන්නන්ද පරලොව කෙරෙහි දැඩිව විශ්වාස කරන්නන්ද වෙති.

اِنَّ الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ زَيَّنَّا لَهُمْ اَعْمَالَهُمْ فَهُمْ يَعْمَهُوْنَ ⑤

5. පරලොව කෙරෙහි විශ්වාස නොකරන අය (ගත් කළ) අපි ඔවුන්ගේ ක්‍රියාවන් ඔවුන්ට අලංකාරව (පෙනෙන්නට) සැලැස්වූවෙමු. එබැවින් ඔවුන් අන්ධව අයාලේ යන්නන් වෙති.

اُولٰٓئِكَ الَّذِيْنَ لَهُمْ سُوْٓءُ الْعَذَابِ وَهُمْ فِى الْاٰخِرَةِ هُمُ الْاَخْسَرُوْنَ ⑥

6. බරපතල දඬුවම ලැබෙන්නේ ඔවුන්ටමය. තවද පරලොවෙහි අතිශයින්ම පාඩු විඳින්නන් ඔවුන්ම වන්නෝය.

وَاِنَّكَ لَتُلَقَّى الْقُرْاٰنَ مِنْ لَّدُنْ حَكِيْمٍ عَلِيْمٍ ⑦

7. සැබැවින්ම මෙම කුර්ආනය, එකම ප්‍රඥාසම්පන්න මෙන්ම සියල්ල දත්තා වෙතින් ඔබට පිරිනමනු ලබන්නේය.

اِذْ قَالَ مُوْسٰى لِاَهْلِهٖٓ اِنِّيْٓ اٰنَسْتُ نَارًا سَاٰتِيْكُمْ مِّنْهَا بِخَبَرٍ اَوْ اٰتِيْكُمْ بِشِهَابٍ قَبَسٍ لَّعَلَّكُمْ تَصْطَلُوْنَ ⑧

8. මූසා තම පවුලේ අය වෙත, 'මම ගින්නක් දැක්කෙමි. මම එයින් නුඹලාට තොරතුරු සමහරක් ගෙන එන්නෙමි. නැතහොත් නුඹලා උණුසුම් වීම පිණිස මම (දැවෙන) ගිනි පෙනෙල්ලක් ගෙන එන්නෙමි'යි පැවසූ අවස්ථාව (සිහිපත් කරනු).

◆ පරිශුද්ධය, සියල්ල අසන්නාය.

فَلَمَّا جَآءَهَا نُوْدِيَ اَنْۢ بُوْرِكَ مَنْ فِي النَّارِ وَمَنْ حَوْلَهَا ؕ وَ سُبْحٰنَ اللّٰهِ رَبِّ الْعٰلَمِيْنَ ⑨

9. ඔහු එය වෙත පැමිණි විට 'ගින්නෙහි ඇති අයද එය වටා ඇති අයද ආශිර්වාද ලද්දෝය. තවද සර්ව ලෝකයන්ට අධිපතියාණන් වන අල්ලාහ් සුවිශුද්ධ වන්නේයැ'යි (හඬකින්) ඔහු කැඳවනු ලැබීය.

يٰمُوْسٰٓى اِنَّهٗٓ اَنَا اللّٰهُ الْعَزِيْزُ الْحَكِيْمُ ۙ⑩

10. 'එම්බල මූසා, සැබැවින්ම මම අල්ලාහ් වෙමි. බලසම්පන්නය ප්‍රඥාසම්පන්නය'.

وَاَلْقِ عَصَاكَ ؕ فَلَمَّا رَاٰهَا تَهْتَزُّ كَاَنَّهَا جَآنٌّ وَّلّٰى مُدْبِرًا وَّلَمْ يُعَقِّبْ ؕ يٰمُوْسٰى لَا تَخَفْ ۟ اِنِّىْ لَا يَخَافُ لَدَىَّ الْمُرْسَلُوْنَ ۖ⑪

11. 'තවද ඔබගේ සැරයටිය බිමට විසි කරන්න'. තවද ඔහු එය නළියන සර්පයෙකු මෙන් දුටු විට ඔහු පසුබසිමින් ආපසු හැරුණේය. තවද පිටුපස නොබැලුවේය. 'එම්බල මූසා! බිය නොවන්න. සැබැවින්ම මම (ඔබ සමග) වෙමි. මා ඉදිරියෙහි දූතයින් බිය වන්නට අවශ්‍ය නැත'.

اِلَّا مَنْ ظَلَمَ ثُمَّ بَدَّلَ حُسْنًۢا بَعْدَ سُوْٓءٍ فَاِنِّىْ غَفُوْرٌ رَّحِيْمٌ ⑫

12. 'තවද කවුරුන් හෝ වැරදි කර පසුව එම වැරැද්ද යහපත බවට හරවන්නේද, ඔවුන් ගත්කළ ඇත්තෙන්ම මම (ඔවුන් හට) අතිශයින්ම ක්ෂමාන්විත (මෙන්ම) පරම දයාබර වෙමි'.

وَاَدْخِلْ يَدَكَ فِىْ جَيْبِكَ تَخْرُجْ بَيْضَآءَ مِنْ غَيْرِ سُوْٓءٍ ۟ فِىْ تِسْعِ اٰيٰتٍ اِلٰى فِرْعَوْنَ وَقَوْمِهٖ ؕ اِنَّهُمْ كَانُوْا قَوْمًا فٰسِقِيْنَ ⑬

13. 'එමෙන්ම ඔබගේ අත ඔබගේ කිහිල්ල තුළට දමන්න. එය කිසිදු කැළලෙන් තොරව සුදට නික්මෙන්නේය. (මෙය) ෆිර්අවුන් සහ ඔහුගේ ජනතාව වෙත සළකුණු නවය අතර වන්නේය. නියතවශයෙන්ම ඔවුහු කැරලිකාර ජනතාවක් වෙති'.

فَلَمَّا جَآءَتْهُمْ اٰيٰتُنَا مُبْصِرَةً قَالُوْا هٰذَا سِحْرٌ مُّبِيْنٌ ۚ⑭

14. නමුත් පැහැදිලිව දකින්නාවූ අපගේ සළකුණු ඔවුන් වෙත පැමිණි කල්හි, 'මෙය පැහැදිලි මායාවකි'යි ඔවුන් පැවසූහ.

وَجَحَدُوْا بِهَا وَاسْتَيْقَنَتْهَآ اَنْفُسُهُمْ

15. තවද ඔවුන්ගේ හදවත් ඒවා පිළිගත්තද ඔවුහු ඒවා වැරදි

ظُلْمًا وَعُلُوًّا ۚ فَانْظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الْمُفْسِدِينَ ﴿١٥﴾

සහගතවද, උඩගුවෙන්ද ප්‍රතික්ෂේප කළහ. එසේනම් දූෂිතව ක්‍රියා කළ අයගේ අවසානය කෙසේ (නපුරු) වූයේ දැයි බලනු!

وَلَقَدْ آتَيْنَا دَاوُودَ وَسُلَيْمَانَ عِلْمًا ۖ وَقَالَا الْحَمْدُ لِلَّهِ الَّذِي فَضَّلَنَا عَلَىٰ كَثِيرٍ مِنْ عِبَادِهِ الْمُؤْمِنِينَ ﴿١٦﴾

16. එමෙන්ම අපි දාවූද්ටද සුලෙයිමාන්ටද ඥානය දුන්නෙමු. තවද ඔවුන් දෙදෙනා, 'සියළු ප්‍රශංසා අල්ලාහ්ට අයත් වේ. ඔහුගේ විශ්වාසිත දාසයින් බොහෝ අයට වඩා ඔහු අපව උසස් කළේ යැ'යි කීහ.

وَوَرِثَ سُلَيْمَانُ دَاوُودَ ۖ وَقَالَ يَا أَيُّهَا النَّاسُ عُلِّمْنَا مَنْطِقَ الطَّيْرِ وَأُوتِينَا مِنْ كُلِّ شَيْءٍ ۖ إِنَّ هَٰذَا لَهُوَ الْفَضْلُ الْمُبِينُ ﴿١٧﴾

17. තවද සුලෙයිමාන් දාවූද්ගේ පරපුරෙන් විය. තවද ඔහු, 'එම්බල ජනතාවෙනි! අපි පක්ෂීන්ගේ භාෂාව උගන්වනු ලැබ ඇත්තෙමු. තවද අපට සියළු දේවල් පිරිනමනු ලැබ ඇත. ඇත්තෙන්ම මෙය නම් (දෙවියන්ගේ) ප්‍රකට අනුග්‍රහය වේයැ'යි පැවසුවේය.

وَحُشِرَ لِسُلَيْمَانَ جُنُودُهُ مِنَ الْجِنِّ وَالْإِنْسِ وَالطَّيْرِ فَهُمْ يُوزَعُونَ ﴿١٨﴾

18. තවද සුලෙයිමාන් වෙත ජින්වරුන් මිනිසුන් සහ පක්ෂීන් ගෙන් වූ ඔහුගේ සේනාවන් එක්රැස් කරනු ලැබූහ. තවද ඔවුන් වෙන් වෙන් අංශ වලට පෙළගස්වනු ලැබූහ.

حَتَّىٰ إِذَا أَتَوْا عَلَىٰ وَادِ النَّمْلِ قَالَتْ نَمْلَةٌ يَا أَيُّهَا النَّمْلُ ادْخُلُوا مَسَاكِنَكُمْ لَا يَحْطِمَنَّكُمْ سُلَيْمَانُ وَجُنُودُهُ وَهُمْ لَا يَشْعُرُونَ ﴿١٩﴾

19. ඔවුන් 'අල් නම්ල්' නම් මිටියාවතට පැමිණි විට, 'නම්ල්(සමූහයා)ට' අයත් ස්ත්‍රියක් (මෙසේ) පැවසුවාය. 'එම්බල නම්ල්! නුඹලාගේ වාසස්ථාන වලට ඇතුළු වනු. නැතහොත් සුලෙයිමාන් සහ ඔහුගේ සේනාවන් ඔවුන් නොදැනුවත්ව නුඹලාව තලාපෙළා දමනු ඇත'.

فَتَبَسَّمَ ضَاحِكًا مِنْ قَوْلِهَا وَقَالَ رَبِّ أَوْزِعْنِي أَنْ أَشْكُرَ نِعْمَتَكَ الَّتِي أَنْعَمْتَ عَلَيَّ وَعَلَىٰ وَالِدَيَّ وَأَنْ أَعْمَلَ

20. ඉන්පසුව ඇයගේ වදන්වලට ඔහු මඳහසින් සිනාසුනේය. තවද 'මාගේ අධිපතියාණෙනි! මා වෙතද මාගේ දෙමාපියන් වෙතද ඔබ පිරිනමා ඇති ඔබගේ අනුග්‍රහයට මා කෘතඥ වීමටද ඔබ තෘප්තිමත් වන ආකාරයට මා යහපත් ක්‍රියාවන්

صَالِحًا تَرْضَاهُ وَأَدْخِلْنِي بِرَحْمَتِكَ فِي عِبَادِكَ الصَّالِحِينَ ٢٠

කිරීමටද මා හට හැකියාව ලබා දෙනු මැනව. තවද ඔබගේ දයාවෙන් ඔබගේ ධාර්මිෂ්ඨ දාසයින් අතරට මාව ඇතුලත් කරනු මැනවැ'යි ඔහු පැවසුවේය.

وَتَفَقَّدَ الطَّيْرَ فَقَالَ مَا لِيَ لَا أَرَى الْهُدْهُدَ أَمْ كَانَ مِنَ الْغَائِبِينَ ٢١

21. තවද ඔහු පක්ෂීන්ව පරීක්ෂා කොට 'මා හුද්හුද්ව◆ නොදකින්නේ මන්ද? ඔහු නොපැමිණෙන්නන් අතරද?'යි කීවේය.

لَأُعَذِّبَنَّهُ عَذَابًا شَدِيدًا أَوْ لَأَذْبَحَنَّهُ أَوْ لَيَأْتِيَنِّي بِسُلْطَانٍ مُبِينٍ ٢٢

22. 'ඔහු (නොපැමිණීමට) පැහැදිලි කාරණාවක් නොගෙනාවේ නම්, මා ඔහුට බරපතල දඬුවමක් නියම කරන්නෙමි. නැතහොත් මා ඔහුව මරා දමන්නෙමි'(යි කීවේය).

فَمَكَثَ غَيْرَ بَعِيدٍ فَقَالَ أَحَطْتُ بِمَا لَمْ تُحِطْ بِهِ وَجِئْتُكَ مِنْ سَبَإٍ بِنَبَإٍ يَقِينٍ ٢٣

23. තවද ඔහු (සුලෛමාන්) වැඩි වේලාවක් ගත කිරීමට මත්තෙන් (හුද්හුද් පැමිණ මෙසේ) කීවේය. 'ඔබ නොදත් දෙයක් මම දැන ගත්තෙමි. තවද මම සබා වෙතින් සත්‍ය තොරතුරු සමග ඔබ වෙත පැමිණ ඇත්තෙමි'.

إِنِّي وَجَدْتُ امْرَأَةً تَمْلِكُهُمْ وَأُوتِيَتْ مِنْ كُلِّ شَيْءٍ وَلَهَا عَرْشٌ عَظِيمٌ ٢٤

24. 'ස්ත්‍රියක් ඔවුන්ව පාලනය කරනු මම දුටුවෙමි. තවද ඇයට සියළු දේවල් පිරිනමනු ලැබ ඇත. තවද ඇයට බලවත් සිංහාසනයක්ද ඇත'.

وَجَدْتُهَا وَقَوْمَهَا يَسْجُدُونَ لِلشَّمْسِ مِنْ دُونِ اللَّهِ وَزَيَّنَ لَهُمُ الشَّيْطَانُ أَعْمَالَهُمْ فَصَدَّهُمْ عَنِ السَّبِيلِ فَهُمْ لَا يَهْتَدُونَ ٢٥

25. 'මම ඇයව සහ ඇයගේ සමූහය අල්ලාහ් වෙනුවට හිරුට නමස්කාර කරනු දුටුවෙමි. තවද ෂෙයිතාන් ඔවුන්ගේ ක්‍රියාවන් ඔවුනට අලංකාරව (පෙනෙන්නට) සලසා ඇත. තවද මෙලෙස ඔවුන්ව (යහ) මගින් වැළැක්වූයේය. එබැවින් ඔවුන් මගපෙන්වීම අනුගමනය නොකරන්නෝය'.

أَلَّا يَسْجُدُوا لِلَّهِ الَّذِي يُخْرِجُ الْخَبْءَ فِي السَّمَاوَاتِ وَالْأَرْضِ وَيَعْلَمُ مَا تُخْفُونَ

26. 'අහස් සහ පෙළොවෙහි සැඟවුනු දේ ප්‍රකට කරන්නාවූද නුඹලා සඟවන දේ මෙන්ම නුඹලා හෙළි කරන දේ දන්නාවූද අල්ලාහ්ට නමස්කාර

◆ මෙහි හුද්හුද් යනු පක්ෂියෙක් නොව උසස් සිතුවිලි ඇති මිනිසෙක්ය. සුලෙයිමාන් (අලෛ) ඔහුව තමාගේ යුධ නිලධාරියෙකු වශයෙන් නියම කළේය.

| | |
|---|---|
| වමා තුඃලිනූන් ﴿٢٦﴾ | නොකළ යුතුයැ(යි ෂෙයිතාන් ඔවුන්ට අණ කර ඇත)'. |
| اَللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ رَبُّ الۡعَرۡشِ الۡعَظِيۡمِ ﴿٢٧﴾ | 27. 'අල්ලාහ් ! නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නැත. අති මහත්වූ සිංහාසනයේ අධිපතියාණන්ය'. |
| قَالَ سَنَنۡظُرُ اَصَدَقۡتَ اَمۡ كُنۡتَ مِنَ الۡكٰذِبِيۡنَ ﴿٢٨﴾ | 28. ඔහු (සුලෙමාන්) 'නුඹ සත්‍යය පැවැසුවේද නැතහොත් නුඹ බොරු පවසන්නන්ගෙන් කෙනෙක්දැයි අපි බලන්නෙමු'යි පැවසුවේය. |
| اِذۡهَبْ بِّكِتٰبِىۡ هٰذَا فَاَلۡقِهۡ اِلَيۡهِمۡ ثُمَّ تَوَلَّ عَنۡهُمۡ فَانۡظُرۡ مَاذَا يَرۡجِعُوۡنَ ﴿٢٩﴾ | 29. 'නුඹ මාගේ මෙම හසුන ගෙන යනු. තවද එය ඔවුන් ඉදිරියේ තබනු. පසුව ඔවුන්ගෙන් පසෙකට වනු. තවද ඔවුන් කුමන (පිළිතුරක්) දෙන්නේ දැයි බලනු.' |
| قَالَتۡ يٰۤاَيُّهَا الۡمَلَؤُا اِنِّىۡۤ اُلۡقِىَ اِلَىَّ كِتٰبٌ كَرِيۡمٌ ﴿٣٠﴾ | 30. ඇය (රැජින), 'එම්බල ප්‍රධානියනි! උතුම් වූ හසුනක් මා වෙත එවන ලද්දේයැ'යි කීවාය. |
| اِنَّهٗ مِنۡ سُلَيۡمٰنَ وَاِنَّهٗ بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۙ﴿٣١﴾ | 31. "එය සුලෙයිමාන්ගෙන්ය. එමෙන්ම එය මෙයයි, 'මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්ය'. |
| اَلَّا تَعۡلُوۡا عَلَىَّ وَاۡتُوۡنِىۡ مُسۡلِمِيۡنَ ﴿٣٢﴾ | 32. (එහි පුවත මෙයයි,) 'මා වෙත අහංකාරව නොහැසිරෙනු. නමුත් අවනතව මා වෙත පැමිණෙනු'". |
| قَالَتۡ يٰۤاَيُّهَا الۡمَلَؤُا اَفۡتُوۡنِىۡ فِىۡۤ اَمۡرِىۡ ۚ مَا كُنۡتُ قَاطِعَةً اَمۡرًا حَتّٰى تَشۡهَدُوۡنِ ﴿٣٣﴾ | 33. 'එම්බල ප්‍රධානියනි! මා ඉදිරියෙහි ඇති මෙම කාරණාව පිළිබඳව මට උපදෙස් දෙනු. නුඹලා මා සමග පෙනීසිට (නුඹලාගේ උපදෙස් මට දෙන) තුරු මම කිසිවිටෙකත් කිසිදු කාරණාවක් පිළිබඳව තීරණය නොගන්නෙමි'යි කීවාය. |
| قَالُوۡا نَحۡنُ اُولُوۡا قُوَّةٍ وَّاُولُوۡا بَاۡسٍ شَدِيۡدٍ ۙ وَّالۡاَمۡرُ اِلَيۡكِ فَانۡظُرِىۡ | 34. (එයට) ඔවුහු, 'අපි බලය හිමි අය වෙමු. තවද අපි දරුණු සටන්කාමීන් වෙමු. නමුත් අණකිරීම ඔබ වෙතය. එබැවින් ඔබ කුමක් අණ |

مَاذَا تَأْمُرِينَ ۝٣٤

කරන්නේ දැයි සලකා බලන්නැ'යි පිළිතුරු දුන්හ.

قَالَتْ إِنَّ الْمُلُوكَ إِذَا دَخَلُوا قَرْيَةً أَفْسَدُوهَا وَجَعَلُوا أَعِزَّةَ أَهْلِهَا أَذِلَّةً ۖ وَكَذَٰلِكَ يَفْعَلُونَ ۝٣٥

35. (එවිට) ඇය, 'නියතවශයෙන්ම රජවරුන්, ඔවුන් දේශයකට ඇතුළු වන විට, එය වනසා දමති. තවද එහි වෙසෙන්නන්ගෙන් උතුම් අයව පහත් තත්ත්වයට පත් කරති. තවද ඔවුන් කරනුයේ එලෙසමයැ'යි කීවාය.

وَإِنِّي مُرْسِلَةٌ إِلَيْهِمْ بِهَدِيَّةٍ فَنَاظِرَةٌ بِمَ يَرْجِعُ الْمُرْسَلُونَ ۝٣٦

36. 'නමුත් මම ඔවුනට ත්‍යාගයක් යවන්නෙමි. තවද රාජදූතයින් කුමන (පිළිතුරක්) ගෙන එන්නේ දැයි බලා සිටින්නෙමි'.

فَلَمَّا جَاءَ سُلَيْمَانَ قَالَ أَتُمِدُّونَنِ بِمَالٍ فَمَا آتَانِيَ اللَّهُ خَيْرٌ مِمَّا آتَاكُمْ بَلْ أَنْتُمْ بِهَدِيَّتِكُمْ تَفْرَحُونَ ۝٣٧

37. එබැවින් (ඔවුන්) සුලෙයිමාන් වෙත පැමිණි කල්හි, ඔහු (මෙසේ) පැවසුවේය. 'නුඹලා (නුඹලාගේ) ධනයෙන් මා හට උදව් කිරීමට අදහස් කරන්නෙහුද? නමුත් අල්ලාහ් මා හට දී ඇති දේ ඔහු නුඹලාට දී ඇති දේට වඩා ශ්‍රේෂ්ඨය. එහෙත් නුඹලා නුඹලාගේ තිළිණය මත ආඩම්බරව ප්‍රීති වන්නෙහුය'.

ارْجِعْ إِلَيْهِمْ فَلَنَأْتِيَنَّهُمْ بِجُنُودٍ لَا قِبَلَ لَهُمْ بِهَا وَلَنُخْرِجَنَّهُمْ مِنْهَا أَذِلَّةً وَهُمْ صَاغِرُونَ ۝٣٨

38. '(එම්බා හුද් හුද්) ඔවුන් වෙතට ආපසු යනු. මන්දයත් ඔවුනට මුහුණපෑමට නොහැකි සේනාවන් සමග නියතවශයෙන්ම අපි ඔවුන් වෙතට එන්නෙමු. තවද අපි ඔවුන්ව එහි සිට නින්දිතව පලවා හරින්නෙමු. තවද ඔවුන් යටහත් පහත් වනු ඇත'.

قَالَ يَا أَيُّهَا الْمَلَأُ أَيُّكُمْ يَأْتِينِي بِعَرْشِهَا قَبْلَ أَنْ يَأْتُونِي مُسْلِمِينَ ۝٣٩

*39. 'එම්බල උසස් ප්‍රධානියනි! ඔවුන් මා වෙත යටහත්ව පැමිණෙන්නට පෙර ඇයගේ සිංහාසනය මා වෙත ගෙන එන්නේ නුඹලාගෙන් කවරෙක්දැ?'යි ඔහු කීවේය.

*සටහන. 39: පහත වාක්‍යයන් වලින් පැහැදිලි වන්නේ සුලෙයිමාන් මෙහිදී ඇගේම සිංහාසනය සඳහන් නොකළ බවයි. ඔහු අදහස් කළේ ඇයගේ සිංහාසනයට සමාන එකක් නිපදවීමට හෝ ඇගේ සිංහාසනයට ඉතා සමීප ආදේශයක් ඔහු වෙත ගෙන ආ යුතු බවයි. මෙහිදී සුලෙයිමාන්ගේ සභාවට ඇය පැමිණීමට පෙරම ඇයගේ සිංහාසනයට සමාන එකක් සුලෙයිමාන් සතුව තිබෙනු දැකීම ඇයව මවිතයට පත් කිරීමකි. මින් මතුවට එන වාක්‍යවලින් මතුකරනු ලබන සිදුවීම් වලින් පැහැදිලිව පෙන්වා දෙන්නේ, ඔහුගේ සභාවේ එක් එක් උසස් ප්‍රධානියන් තමන්ට එම කාර්යය භාර කරන ලෙස ඉල්ලමින්, එම කාර්ය ප්‍රතිවාදීන්ට වඩා තමන්ට ඉතා ඉක්මනින් සහ හොඳින් කළ හැකි යැයි කියා සිටි බවයි. අවසානයේදී, එහි ආදේශයක් මුල්

قَالَ عِفْرِيْتٌ مِّنَ الْجِنِّ اَنَا اٰتِيْكَ بِهٖ قَبْلَ اَنْ تَقُوْمَ مِنْ مَّقَامِكَ ۚ وَ اِنِّيْ عَلَيْهِ لَقَوِيٌّ اَمِيْنٌ ﴿٤٠﴾

40. ජින්වරුන් අතරින් (ඉෆ්රීත් නම් කඳුවාසීන්ගේ) බලවතෙක් 'ඔබ ඔබගේ කඳවුරෙන් නික්මීමට පෙර මම එය ඔබ වෙත ගෙන එන්නෙමි. තවද ඇත්තෙන්ම මම ඒ සඳහා බලය ඇත්තෙක් වෙමි. තවද මම විශ්වාසදායකයෙක් වෙමි'යි පැවසුවේය.

قَالَ الَّذِيْ عِنْدَهٗ عِلْمٌ مِّنَ الْكِتٰبِ اَنَا اٰتِيْكَ بِهٖ قَبْلَ اَنْ يَّرْتَدَّ اِلَيْكَ طَرْفُكَ ؕ فَلَمَّا رَاٰهُ مُسْتَقِرًّا عِنْدَهٗ قَالَ هٰذَا مِنْ فَضْلِ رَبِّيْ ۖ لِيَبْلُوَنِيْٓ ءَاَشْكُرُ اَمْ اَكْفُرُ ؕ وَمَنْ شَكَرَ فَاِنَّمَا يَشْكُرُ لِنَفْسِهٖ ۚ وَمَنْ كَفَرَ فَاِنَّ رَبِّيْ غَنِيٌّ كَرِيْمٌ ﴿٤١﴾

41. පුස්තකය ගැන දැනුමැති කෙනෙක් 'ඔබගේ ඇසිපිය හෙළන සැනින් මම එය ඔබ වෙත ගෙන එන්නෙමි'යි කීවේය. තවද ඔහු තම ඉදිරියෙහි එය තිබෙනු දුටුවිට, 'මෙය මාගේ අධිපතියාණන්ගේ දයාවෙන්ය. එය ඔහු මාව, මා කෘතඥවන්නේද නැතහොත් අකෘතඥවන්නේදැයි පිරික්සනු පිණිසය. තවද යමෙක් කෘතඥවන්නේද එය (තම) යහපත සඳහා කෘතඥවීමකි. නමුත් යමෙක් අකෘතඥවන්නේද සැබැවින්ම මාගේ අධිපතියාණන් ස්වයංපෝෂිතය මහත් ත්‍යාගශීලියැ'යි ඔහු (සුලෙයිමාන්) පැවසුවේය.

قَالَ نَكِّرُوْا لَهَا عَرْشَهَا نَنْظُرْ اَتَهْتَدِيْٓ اَمْ تَكُوْنُ مِنَ الَّذِيْنَ لَا يَهْتَدُوْنَ ﴿٤٢﴾

42. 'ඇයගේ සිංහාසනය ඇයට සාමාන්‍ය දෙයක් ලෙස පෙනෙන්නට සලස්වනු. තවද ඇය යහමග අනුගමනය කරන්නිද නැතහොත් ඇය යහමග අනුගමනය නොකරන්නන්ගෙන් (කෙනෙක්) වන්නීදැයි අපි බලලමු'යි ඔහු කීවේය.

فَلَمَّا جَآءَتْ قِيْلَ اَهٰكَذَا عَرْشُكِ ؕ

43. එමෙන්ම ඇය පැමිණි කල්හි, 'ඔබගේ සිංහාසනය මෙබඳුදැ?'යි

---

වරට ඔහු වෙතට ඉදිරිපත් කළ විට, ඔහු ඒ වෙනුවෙන් දෙවියන්ව ප්‍රසංශා කොට එය තව දුරටත් වෙනස් කිරීමට අණ කළේය. මන්ද එවිට එය සබා රැජිනගේ සිංහාසනයට සමාන පෙනුමක් ගෙන දී අද්විතීය සිංහාසනයක හිමිකම් කීමේ ආඩම්බරය ඇයගෙන් තුරන් කිරීමටද වේ. නක්කිරූ ලහා අර්ෂහා (نَكِّرُوْا لَهَا عَرْشَهَا) යන වාක්‍යය පැහැදිලිවම මෙම අර්ථයට සාධකයකි. එනම්, ඇයගේ සිංහාසනයට සමාන වූ සිංහාසනයක් ඇය දුටුවා නම්, ඇයගේ සිංහාසනය ඇය විශ්වාස කළ පරිදි විශේෂිත වූද අද්විතීය වූ එකක් නොවන බවට ඇය වටහාගනු ඇත. එබැවින් මෙහිදී යෙදෙන නක්කිරූ (نَكِّرُوْا)යන්නෙහි තේරුම නම්, ඇයගේ සිංහාසනය සාමාන්‍ය පෙනුමැති එකක් බවය. සුලෙයිමාන්ගේ ශිල්පීන් විසින් තනන ලද සිංහාසනය රැජින ඇත්තටම දකින විට ඇයගේ ප්‍රතිචාරය වූයේ, තම සිංහාසනය මෑතකදී සොරකම් කරනු ලැබූ හෝ ශිල්පීන් එහි වෙනසක් සෙවිය නොහැකි තරමට දක්ෂ ලෙස නිර්මාණය කළ බැවින් තමාගේම සිංහාසනය හඳුනාගත නොහැකි වූ කෙනෙකුගේ ප්‍රතිචාරයක් නොවේ. ඇයගේ ප්‍රතිචාරය වූයේ, ඇයගේ භාණ්ඩයකට සමාන එකක් දකින කෙනෙකුගේ ප්‍රතිචාරයකි. මෙයින් පැහැදිලිව ඔප්පු වන්නේ අප දකින මෙම සිද්ධිය වඩා යථාර්ථ බවය.

قَالَتْ كَاَنَّهٗ هُوَ ۚ وَاُوْتِيْنَا الْعِلْمَ مِنْ قَبْلِهَا وَكُنَّا مُسْلِمِيْنَ ﴿٤٣﴾

පවසන ලදි. ඇය 'එයද මේ හා සමානය. තවද අප හට මීට පෙර දැනුම දෙන ලදි. තවද අපි කලින් අවනතවන්නන් වූවෙමු'යි පිළිතුරු දුන්නාය.

وَصَدَّهَا مَا كَانَتْ تَّعْبُدُ مِنْ دُوْنِ اللّٰهِ ؕ اِنَّهَا كَانَتْ مِنْ قَوْمٍ كٰفِرِيْنَ ﴿٤٤﴾

44. තවද ඔහු ඇයව අල්ලාහ් හැර නමස්කාර කරමින් සිටි දෙයින් වැළැක්වූවේය. නියතවශයෙන්ම ඇය අවිශ්වාසීත ජනතාවගෙන් වූවාය.

قِيْلَ لَهَا ادْخُلِى الصَّرْحَ ۚ فَلَمَّا رَاَتْهُ حَسِبَتْهُ لُجَّةً وَّكَشَفَتْ عَنْ سَاقَيْهَا ؕ قَالَ اِنَّهٗ صَرْحٌ مُّمَرَّدٌ مِّنْ قَوَارِيْرَ ۬ ؕ قَالَتْ رَبِّ اِنِّىْ ظَلَمْتُ نَفْسِىْ وَاَسْلَمْتُ مَعَ سُلَيْمٰنَ لِلّٰهِ رَبِّ الْعٰلَمِيْنَ ﴿٤٥﴾

*45. 'මාලිගාවට පිවිසෙන්නැ'යි ඇයට කියන ලදි. තවද ඇය, එය දුටු කල්හි, එය ගැඹුරු ජලය යැයි සිතා ඇයගේ කෙණ්ඩයෙන් වස්ත්‍රය ඉවත් කළාය. 'මෙය වීදුරු තට්ටු වලින් සිනිඳුව හැඩගස්වන ලද මාලිගාවක්යැ'යි (සුලෙමාන්) කීවේය. ඇය, 'මාගේ අධිපතියාණෙනි! මම ඇත්තෙන්ම මාගේ ආත්මයට වැරදි කර ගත්තෙමි. තවද මම සුලෙමාන් සමග සර්ව ලෝකයන්ට අධිපතියාණන් වන අල්ලාහ්ට අවනත වෙමි'යි කීවාය

وَلَقَدْ اَرْسَلْنَاۤ اِلٰى ثَمُوْدَ اَخَاهُمْ صٰلِحًا اَنِ اعْبُدُوا اللّٰهَ فَاِذَا هُمْ فَرِيْقٰنِ يَخْتَصِمُوْنَ ﴿٤٦﴾

46. තවද අපි සමුද් වෙත ඔවුන්ගේ සොහොයුරු සාලිහ්ව යැව්වෙමු. 'අල්ලාහ්ට නමදිනු'යි (ඔහු කීවේය.) නමුත් බලනු! ඔවුන් එකිනෙකාට තර්ක කරන දෙපිරිසක් වූහ.

قَالَ يٰقَوْمِ لِمَ تَسْتَعْجِلُوْنَ بِالسَّيِّئَةِ قَبْلَ الْحَسَنَةِ ۚ لَوْلَا تَسْتَغْفِرُوْنَ اللّٰهَ لَعَلَّكُمْ تُرْحَمُوْنَ ﴿٤٧﴾

47. ඔහු, 'මාගේ ජනතාවනි! නුඹලා යහපතට වඩා නපුරට ඉක්මන් වන්නේ මන්ද? නුඹලාට දයාව දක්වනු ලැබීම පිණිස නුඹලා අල්ලාහ්ගෙන් සමාව අයැද නොසිටින්නේ මක්නිසාදැ?'යි කීවේය.

قَالُوا اطَّيَّرْنَا بِكَ وَبِمَنْ مَّعَكَ ؕ قَالَ

48. ඔවුහු 'අපි ඔබවත් ඔබ සමග

*සටහන. 45: විනිවිද වූ ඉතා උසස් තත්වයේ වීදුරු තට්ටුව, ජලයක බඳු හැඟීමක් ගෙන දීමට හැකිය. ඇත්තටම සිදු වූයේ එවැන්නකි. ඉතාමත් ඥානවන්ත වූ රැජිනට මෙමගින් පෙන්නුම් කර දුන් පණිවිඩය නම්, පෙන්නුම් කරන දේට වඩා සමහර දේ හාත්පසින්ම වෙනස් බවය. තවද යමක් පරාවර්ථනය කරන දේ ඒවාට අයත් නොවන බවය. එසේම හිරු මගින් නිපදවන ශක්තියද ආලෝකයද එයට අයත් නොවන අතර එය අයත් වන්නේ එහි මැවුම්කරුවාට පමණි.

طَٰٓئِرُكُمْ عِندَ ٱللَّهِ بَلْ أَنتُمْ قَوْمٌ تُفْتَنُونَ ﴿٤٨﴾

සිටින අයවත් අසුබ නිමිත්තක් ලෙස දකිමු'යි කීහ. ඔහු 'නුඹලාගේ අසුභ නිමිත්ත අල්ලාහ් වෙතය. නමුත් නුඹලා පිරික්සනු ලබන ජනතාවක්යැ'යි කීවේය.

وَكَانَ فِى ٱلْمَدِينَةِ تِسْعَةُ رَهْطٍ يُفْسِدُونَ فِى ٱلْأَرْضِ وَلَا يُصْلِحُونَ ﴿٤٩﴾

49. තවද පොළොවෙහි කලබල ඇති කරන්නන් නව (දෙනෙකුගෙන් යුත්) කණ්ඩායමක් නගරයෙහි වූහ. තවද ඔවුහු නිවැරදි කර නොගන්නෝය.

قَالُوا۟ تَقَاسَمُوا۟ بِٱللَّهِ لَنُبَيِّتَنَّهُۥ وَأَهْلَهُۥ ثُمَّ لَنَقُولَنَّ لِوَلِيِّهِۦ مَا شَهِدْنَا مَهْلِكَ أَهْلِهِۦ وَإِنَّا لَصَٰدِقُونَ ﴿٥٠﴾

50. ඔවුහු (තමන් අතර මෙසේ) කීහ, "නියතවශයෙන්ම අපි ඔහුටද ඔහුගේ පවුලේ අයටද රාත්‍රියේදී පහර දෙන්නෙමු. පසුව අපි ඔහුගේ උරුමක්කාරයින්ට, 'අපි ඔහුගේ පවුලේ අයගේ විනාශය නොදුටුවෙමු. තවද නියතවශයෙන්ම අපි සත්‍යවාදීන් වෙමු'යි අල්ලාහ් මත එකිනෙකා දිවුරනු".

وَمَكَرُوا۟ مَكْرًا وَمَكَرْنَا مَكْرًا وَهُمْ لَا يَشْعُرُونَ ﴿٥١﴾

51. තවද ඔවුන් කුමන්ත්‍රණයක් සැලසුම් කළේය. අපිද (එයට ප්‍රතිවිරුද්ධව) කුමන්ත්‍රණයක් සැලසුම් කළෙමු. තවද ඔවුහු (ඒ ගැන) වටහා නොගන්නෝය.

فَٱنظُرْ كَيْفَ كَانَ عَٰقِبَةُ مَكْرِهِمْ أَنَّا دَمَّرْنَٰهُمْ وَقَوْمَهُمْ أَجْمَعِينَ ﴿٥٢﴾

52. පසුව ඔවුන්ගේ කුමන්ත්‍රණයේ අවසානය කෙසේ (නපුරු) වී දැයි බලනු! සැබැවින්ම, අපි ඔවුන්වද ඔවුන්ගේ ජනතාව සියල්ලන්වද සහමුලින්ම විනාශ කළෙමු.

فَتِلْكَ بُيُوتُهُمْ خَاوِيَةًۢ بِمَا ظَلَمُوٓا۟ إِنَّ فِى ذَٰلِكَ لَءَايَةً لِّقَوْمٍ يَعْلَمُونَ ﴿٥٣﴾

53. තවද මේවා ඔවුන් කළ වැරදි ක්‍රියා නිසා ඔවුන්ගේ විනාශ වූනු පාළු ගෙවල්ය. එහි සැබැවින්ම දැනුමැති ජනතාවට සළකුණක් ඇත.

وَأَنجَيْنَا ٱلَّذِينَ ءَامَنُوا۟ وَكَانُوا۟ يَتَّقُونَ ﴿٥٤﴾

54. තවද විශ්වාස කර දෙවියන් කෙරෙහි බියබැතිමත් වූ අයව අපි මුදවා ගත්තෙමු.

وَلُوطًا إِذْ قَالَ لِقَوْمِهِۦٓ أَتَأْتُونَ ٱلْفَٰحِشَةَ وَأَنتُمْ تُبْصِرُونَ ﴿٥٥﴾

55. තවද ලූත්ව (සිහිපත් කරනු). ඔහු තම ජනතාව වෙත (මෙසේ) කියූ කල්හි, 'නුඹලා (එහි නපුර) දැක දැකම අශික්ෂිතයෙහි ගැලී සිටින්නෙහුද?'

اَىِٕنَّكُمْ لَتَاْتُوْنَ الرِّجَالَ شَهْوَةً مِّنْ دُوْنِ النِّسَآءِ ؕ بَلْ اَنْتُمْ قَوْمٌ تَجْهَلُوْنَ ۝٥٦

56. 'කිමද? නුඹලා ගැහැණුන් වෙනුවට පිරිමින් වෙත කාම තෘෂ්ණාවෙන් යුතුව ලංවන්නෙහුද? නමුත්, ඇත්තෙන්ම නුඹලා අඥාන ජන සමූහයක්ය'.

فَمَا كَانَ جَوَابَ قَوْمِهٖۤ اِلَّاۤ اَنْ قَالُوْۤا اَخْرِجُوْۤا اٰلَ لُوْطٍ مِّنْ قَرْيَتِكُمْ ۚ اِنَّهُمْ اُنَاسٌ يَّتَطَهَّرُوْنَ ۝٥٧

57. නමුත් ඔහුගේ ජනතාවගේ පිළිතුර මෙය හැර අන්කිසිවක් නොවීය. එනම්, 'ඔවුන් තමන්ගේ පවිත්‍ර බව අඟවන්නාවූ පිරිසක් බැවින් නුඹලාගේ නගරයෙන් ලූත්ගේ පවුලේ අයව පන්නා දමනු' යන්නය.

فَاَنْجَيْنٰهُ وَاَهْلَهٗۤ اِلَّا امْرَاَتَهٗ ؗ قَدَّرْنٰهَا مِنَ الْغٰبِرِيْنَ ۝٥٨

58. එබැවින් ඔහුගේ භාර්යයාව හැර ඔහුව සහ ඔහුගේ පවුලේ අයව අපි මුදවා ගත්තෙමු. ඇය පසුබට වූවන්ගෙන් වීමට අපි නියම කළෙමු.

وَاَمْطَرْنَا عَلَيْهِمْ مَّطَرًا ۚ فَسَآءَ مَطَرُ الْمُنْذَرِيْنَ ۝٥٩ ع ١٤ ١٩

59. තවද අපි ඔවුන් මතට වර්ෂාවක් වැස්සවීමු. තවද අවවාද කරනු ලැබූවන් මත වූ වර්ෂාව ඉතා නපුරුය.

قُلِ الْحَمْدُ لِلّٰهِ وَسَلٰمٌ عَلٰى عِبَادِهِ الَّذِيْنَ اصْطَفٰى ؕ آٰللّٰهُ خَيْرٌ اَمَّا يُشْرِكُوْنَ ۝٦٠ ؕ

60. පවසන්න. 'සියළු ප්‍රසංශා අල්ලාහ්ටම අයත්ය. තවද ඔහු තෝරා ගෙන ඇති ඔහුගේ දාසයින්ට සාමය අත්වේවා! වඩාත් හොඳ අල්ලාහ්ද? නැතහොත් ඔවුන් (ඔහුට) සමාන කරන දේවල්ද?'

اَمَّنْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ وَاَنْزَلَ لَكُمْ مِّنَ السَّمَآءِ مَآءً ۚ فَاَنْۢبَتْنَا بِهٖ حَدَآىِٕقَ ذَاتَ بَهْجَةٍ ۚ مَا كَانَ لَكُمْ اَنْ تُنْۢبِتُوْا شَجَرَهَا ؕ ءَاِلٰهٌ مَّعَ اللّٰهِ ؕ بَلْ هُمْ قَوْمٌ يَّعْدِلُوْنَ ۝٦١ ؕ

20-කොටස

61. නැතහොත් අහස්ද පොළොවද මවා අහසින් නුඹලා වෙනුවෙන් ජලය පහළ කළේ කවුරුන්ද? පසුව එමගින් අපි (පළතුරු) වතු වැවීමට සැලැස්වූයෙමු. නුඹලාට ඒවායේ ගස් වැවෙන්නට සැලැස්විය නොහැකි විය. අල්ලාහ් සමග (තවත්) දෙවියෙක් සිටින්නේද? එහෙත් ඔවුන් (යහමගින්) ඉවත්ව යන ජනතාවකි.

أَمَّنْ جَعَلَ الْأَرْضَ قَرَارًا وَجَعَلَ خِلَٰلَهَآ أَنْهَٰرًا وَجَعَلَ لَهَا رَوَٰسِىَ وَجَعَلَ بَيْنَ الْبَحْرَيْنِ حَاجِزًا ۗ أَءِلَٰهٌ مَّعَ اللَّهِ ۚ بَلْ أَكْثَرُهُمْ لَا يَعْلَمُونَ ﴿٦٢﴾

62. නැතහොත් පොළොව විවේක ස්ථානයක් කර තවද ඒ අතර ගංගාවල් පිහිටුවා ඒ මත ස්ථිර කඳු පිහිටුවා තවද ජලාශයන් දෙක අතර බාධකයක් තැබුවේ කවුරුන්ද? අල්ලාහ් සමග (තවත්) දෙවියෙකු සිටින්නේද? නොඑසේය, ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

أَمَّن يُجِيبُ الْمُضْطَرَّ إِذَا دَعَاهُ وَيَكْشِفُ السُّوٓءَ وَيَجْعَلُكُمْ خُلَفَآءَ الْأَرْضِ ۗ أَءِلَٰهٌ مَّعَ اللَّهِ ۚ قَلِيلًا مَّا تَذَكَّرُونَ ﴿٦٣﴾

63. නැතහොත් විපතට පත් තැනැත්තා ඔහුව කැඳවන විට, ඔහු එයට ප්‍රතිචාරය දක්වා තවද නපුර ඉවත් කර නුඹලාව පොළොවෙහි නියෝජිතයින් බවට පත් කරන්නේ කවුරුන්ද? අල්ලාහ් සමග (තවත්) දෙවියෙකු සිටින්නේද? නුඹලා මෙනෙහි කරන්නේ ස්වල්පයකි.

أَمَّن يَهْدِيكُمْ فِى ظُلُمَٰتِ الْبَرِّ وَالْبَحْرِ وَمَن يُرْسِلُ الرِّيَٰحَ بُشْرًۢا بَيْنَ يَدَىْ رَحْمَتِهِۦٓ ۗ أَءِلَٰهٌ مَّعَ اللَّهِ ۚ تَعَٰلَى اللَّهُ عَمَّا يُشْرِكُونَ ﴿٦٤﴾

64. නැතහොත් ගොඩබිමෙහිද සාගරයෙහිද වන සියළු (වර්ගයේ) අන්ධකාරයන්හි නුඹලාට මග පෙන්වන්නේ කවුරුන්ද? එමෙන්ම ඔහුගේ දයාලුභාවයට පෙර සුභාරංචි ලෙස සුළං එවන්නේ කවුරුන්ද? අල්ලාහ් සමග (තවත්) දෙවියෙකු සිටින්නේද? ඔවුන් (ඔහුට) සමාන තබන දේට වඩා අල්ලාහ් අති උසස්ය.

أَمَّن يَبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيدُهُۥ وَمَن يَرْزُقُكُم مِّنَ السَّمَآءِ وَالْأَرْضِ ۗ أَءِلَٰهٌ مَّعَ اللَّهِ ۚ قُلْ هَاتُوا بُرْهَٰنَكُمْ إِن كُنتُمْ صَٰدِقِينَ ﴿٦٥﴾

65. නැතහොත් මැවීම් ආරම්භ කර පසුව එය නැවත නැවතත් කරන්නේ කවුරුන්ද? තවද නුඹලාට අහස සහ පොළොවෙන් ජීවනෝපාය සපයන්නේ කවුරුන්ද? අල්ලාහ් සමග (තවත්) දෙවියෙකු සිටින්නේද? පවසන්න, 'නුඹලා සත්‍යවාදීන් වේ නම් නුඹලාගේ සාධකය ගෙන හැර පානු'.

قُل لَّا يَعْلَمُ مَن فِى السَّمَٰوَٰتِ وَالْأَرْضِ الْغَيْبَ إِلَّا اللَّهُ ۚ وَمَا يَشْعُرُونَ أَيَّانَ يُبْعَثُونَ ﴿٦٦﴾

66. පවසන්න, 'අල්ලාහ් හැර අහස් සහ පොළොවෙහි අදෘශ්‍යමාන දේ කිසිවෙක් නොදනී. තවද ඔවුන් නැගිටවනු ලබන්නේ කවදාදැයිද ඔවුහු නොදනී'.

67. එහෙත්, පරලොව පිළිබඳව ඔවුන්ගේ දැනුම ශූන්‍ය කරා එළැඹී ඇත. එහෙත්, ඔවුන් (ඇත්තෙන්ම) ඒ ගැන සැකයෙහිය. එහෙත්, ඔවුන් ඒ පිළිබඳව අන්ධයන්ය.

بَلِ ادّٰرَكَ عِلْمُهُمْ فِي الْاٰخِرَةِ بَلْ هُمْ فِيْ شَكٍّ مِّنْهَا بَلْ هُمْ مِّنْهَا عَمُوْنَ ﴿٦٧﴾

68. තවද අවිශ්වාස කළ අය, 'කිමද! අප සහ අපගේ පියවරුන් පස් දූවිලි බවට පත්වූ විට අපි ඇත්තෙන්ම (යළිත් ජීවය ලබා) පිටකරනු ලබන්නන් වන්නෙමුදැ?'යි පවසති.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْٓا ءَاِذَا كُنَّا تُرٰبًا وَّاٰبَآؤُنَآ اَئِنَّا لَمُخْرَجُوْنَ ﴿٦٨﴾

69. 'නියතවශයෙන්ම මීට පෙර, අපට සහ අපගේ පියවරුන්ට මෙසේ පොරොන්දු දෙනු ලැබීය. මෙය පැරැන්නන්ගේ කතාන්තර හැර අන් කිසිවක් නොවේ'.

لَقَدْ وُعِدْنَا هٰذَا نَحْنُ وَاٰبَآؤُنَا مِنْ قَبْلُ اِنْ هٰذَآ اِلَّآ اَسَاطِيْرُ الْاَوَّلِيْنَ ﴿٦٩﴾

70. පවසන්න, 'පොළොවෙහි සංචාරය කරනු. තවද පව්කාරයින්ගේ අවසානය කෙසේ (නපුරු)වී දැයි බලනු!'

قُلْ سِيْرُوْا فِي الْاَرْضِ فَانْظُرُوْا كَيْفَ كَانَ عَاقِبَةُ الْمُجْرِمِيْنَ ﴿٧٠﴾

71. තවද ඔබ ඔවුන් වෙනුවෙන් කනස්සල්ලට පත් නොවන්න. තවද ඔවුන්ගේ කුමන්ත්‍රණයන් හේතුවෙන් පීඩාවටද පත් නොවන්න.

وَلَا تَحْزَنْ عَلَيْهِمْ وَلَا تَكُنْ فِيْ ضَيْقٍ مِّمَّا يَمْكُرُوْنَ ﴿٧١﴾

72. තවද ඔවුන් 'නුඹලා සත්‍යවාදීන් නම් මෙම පොරොන්දුව ඉටු කරනු ලබන්නේ කවදා දැ?'යි පවසති.

وَيَقُوْلُوْنَ مَتٰى هٰذَا الْوَعْدُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٧٢﴾

73. පවසන්න, 'නුඹලා ඉක්මන් වන දෙයින් කොටසක් නුඹලාගේ පසු පස එන්නට පුළුවන.'

قُلْ عَسٰٓى اَنْ يَّكُوْنَ رَدِفَ لَكُمْ بَعْضُ الَّذِيْ تَسْتَعْجِلُوْنَ ﴿٧٣﴾

74. තවද නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් මිනිසුන් කෙරෙහි කරුණාවන්තය. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය කෘතඥ නොවෙති.

وَاِنَّ رَبَّكَ لَذُوْ فَضْلٍ عَلَى النَّاسِ وَلٰكِنَّ اَكْثَرَهُمْ لَا يَشْكُرُوْنَ ﴿٧٤﴾

75. තවද නියතවශයෙන්ම ඔවුන්ගේ සිත් සඟවන දේද ඔවුන් එළිකරන දේද ඔබගේ අධිපතියාණන් දන්නේය.

وَاِنَّ رَبَّكَ لَيَعْلَمُ مَا تُكِنُّ صُدُوْرُهُمْ وَمَا يُعْلِنُوْنَ ﴿٧٥﴾

76. තවද අහසෙහි සහ පොළොවෙහි සැඟවුනු කිසිවක් පැහැදිලි ග්‍රන්ථයක (සටහන් වී) මිස නැත.

وَمَا مِنْ غَآئِبَةٍ فِي السَّمَآءِ وَالْاَرْضِ اِلَّا فِيْ كِتٰبٍ مُّبِيْنٍ ﴿٧٦﴾

77. නියතවශයෙන්ම මෙම කුර්ආනය, ඉස්රාඊලයේ දරුවන්ට, ඔවුන් මතභේද ඇති කළ බොහෝ දේ පිළිබඳව විස්තර කරයි.

اِنَّ هٰذَا الْقُرْاٰنَ يَقُصُّ عَلٰى بَنِيْٓ اِسْرَآءِيْلَ اَكْثَرَ الَّذِيْ هُمْ فِيْهِ يَخْتَلِفُوْنَ ﴿٧٧﴾

78. තවද සැබැවින්ම මෙය විශ්වාසිතයින්හට මග පෙන්වීමක්ද දයාවක්ද වේ.

وَاِنَّهٗ لَهُدًى وَّرَحْمَةٌ لِّلْمُؤْمِنِيْنَ ﴿٧٨﴾

79. සැබැවින්ම ඔබගේ අධිපතියාණන් ඔහුගේ නියෝගය මගින් ඔවුනතර විනිශ්චය කරන්නේය. තවද ඔහු බලසම්පන්නය, සියල්ල දත්තාය.

اِنَّ رَبَّكَ يَقْضِيْ بَيْنَهُمْ بِحُكْمِهٖ ۚ وَهُوَ الْعَزِيْزُ الْعَلِيْمُ ﴿٧٩﴾

80. එබැවින් ඔබගේ විශ්වාසය අල්ලාහ් කෙරෙහි තබන්න. නියතවශයෙන්ම ඔබ ප්‍රත්‍යක්ෂ වූ සත්‍යය මත (නිරතව) සිටින්නෙහිය.

فَتَوَكَّلْ عَلَى اللّٰهِ ؕ اِنَّكَ عَلَى الْحَقِّ الْمُبِيْنِ ﴿٨٠﴾

81. සැබැවින්ම මළවුන් අසන්නට ඔබට සැලැස්විය නොහැක. එමෙන්ම බිහිරීන්, පසුබට වන්නන් ලෙස ආපසු හැරී යන විට (ඔබගේ) කැඳවීම (ඔවුනට) අසන්නටද ඔබට සැලැස්විය නොහැක.

اِنَّكَ لَا تُسْمِعُ الْمَوْتٰى وَلَا تُسْمِعُ الصُّمَّ الدُّعَآءَ اِذَا وَلَّوْا مُدْبِرِيْنَ ﴿٨١﴾

82. තවද අන්ධයින්ව ඔවුන්ගේ දුර් මාර්ගයෙන් යහමගට යොමු කිරීම ඔබට කළ නොහැකිය. ඔබට සවන් දෙන්නට සැලැස්විය හැක්කේ අපගේ සළකුණු කෙරෙහි විශ්වාස කරන අයව පමණි. තවද ඔවුන් අවනත වන්නන් වෙති.

وَمَآ اَنْتَ بِهٰدِي الْعُمْيِ عَنْ ضَلٰلَتِهِمْ ؕ اِنْ تُسْمِعُ اِلَّا مَنْ يُّؤْمِنُ بِاٰيٰتِنَا فَهُمْ مُّسْلِمُوْنَ ﴿٨٢﴾

83. තවද ඔවුන්ට එරෙහිව තීරණාත්මක වදන ක්‍රියාත්මක වන විට, අපි ඔවුන් සඳහා පොළොවෙන් ජීවියෙකුව පිට කරන්නෙමු. ජනතාව අපගේ සළකුණු විශ්වාස නොකළ හෙයින් එය ඔවුන්ට තුවාල කරනු ඇත.

وَاِذَا وَقَعَ الْقَوْلُ عَلَيْهِمْ اَخْرَجْنَا لَهُمْ دَآبَّةً مِّنَ الْاَرْضِ تُكَلِّمُهُمْ ۙ اَنَّ النَّاسَ كَانُوْا بِاٰيٰتِنَا لَا يُوْقِنُوْنَ ﴿٨٣﴾

وَيَوْمَ نَحْشُرُ مِن كُلِّ أُمَّةٍ فَوْجًا مِّمَّن يُكَذِّبُ بِآيَاتِنَا فَهُمْ يُوزَعُونَ ﴿٨٤﴾

84. තවද සෑම ජනතාවගෙන්ම අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළ අය අතුරින් පිරිසක් අප එක්රැස් කරන දිනය (ඔවුනට මතක් කර දෙනු). තවද ඔවුන් (වෙන වෙන) කණ්ඩායම් වශයෙන් තබනු ලබන්නෝය.

حَتَّىٰ إِذَا جَاءُوا قَالَ أَكَذَّبْتُم بِآيَاتِي وَلَمْ تُحِيطُوا بِهَا عِلْمًا أَمَّاذَا كُنتُمْ تَعْمَلُونَ ﴿٨٥﴾

85. අවසානයේදී ඔවුන් (ඔහු අභියස) පැමිණෙන කල්හි, 'නුඹලා ඒවායේ සම්පූර්ණ දැනුම ලබා නොතිබියදී (ඉක්මන්වී) මාගේ සළකුණු ප්‍රතික්ෂේප කළෙහුද? (එසේ නැත්නම්) නුඹලා කරමින් සිටි දේ (අන්) කවරක්දැ?'යි ඔහු පවසනු ඇත.

وَوَقَعَ الْقَوْلُ عَلَيْهِم بِمَا ظَلَمُوا فَهُمْ لَا يَنطِقُونَ ﴿٨٦﴾

86. තවද ඔවුන් වැරදි කළ බැවින්, එම තීන්දුව ඔවුන් කෙරෙහි ඉටුවනු ඇත. තවද ඔවුනට කථා කිරීමට නොහැකි වනු ඇත.

أَلَمْ يَرَوْا أَنَّا جَعَلْنَا اللَّيْلَ لِيَسْكُنُوا فِيهِ وَالنَّهَارَ مُبْصِرًا ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّقَوْمٍ يُؤْمِنُونَ ﴿٨٧﴾

87. අප රාත්‍රිය ඔවුන් එහි විවේක ගනු පිණිසත් තවද දහවල එළිය දෙනු පිණිසත් කර ඇති බව ඔවුන් දැක නොතිබේද? සැබැවින්ම විශ්වාස කරන ජනතාවට එහි සළකුණු ඇත.

وَيَوْمَ يُنفَخُ فِي الصُّورِ فَفَزِعَ مَن فِي السَّمَاوَاتِ وَمَن فِي الْأَرْضِ إِلَّا مَن شَاءَ اللَّهُ ۚ وَكُلٌّ أَتَوْهُ دَاخِرِينَ ﴿٨٨﴾

88. තවද සූර්නලාව පිඹිනු ලබන එම දිනයේදී අල්ලාහ් අභිමත කළ අය හැරෙන්නට අහස්හි ඇති සියලු අයද පොළොවෙහි ඇති සියලු අයද බියෙන් තැති ගනු ඇත. තවද සියල්ලන්ම යටහත්ව ඔහු වෙතට පැමිණෙන්නෝය.

وَتَرَى الْجِبَالَ تَحْسَبُهَا جَامِدَةً وَهِيَ تَمُرُّ مَرَّ السَّحَابِ ۚ صُنْعَ اللَّهِ الَّذِي أَتْقَنَ كُلَّ شَيْءٍ ۚ إِنَّهُ خَبِيرٌ بِمَا تَفْعَلُونَ ﴿٨٩﴾

89. තවද ඔබ කඳු දෙස ඒවා නිශ්චලව ඇති බව අනුමාන කරමින් දකින්නෙහිය. නමුත් ඒවා වලාකුළු පාවී යන්නාක් මෙන් පාවෙමින් පවතී. අල්ලාහ්ගේ කාර්යය එවැන්නක්ය. ඔහු සියළු දේ ශක්තිමත්වද ස්ථිරවද කර ඇත. සැබැවින්ම ඔහු නුඹලා කරන දේ මැනැවින් දන්නේය.

مَن جَاءَ بِالْحَسَنَةِ فَلَهُ خَيْرٌ مِّنْهَا وَهُم

90. කවුරුන් හෝ යහපත් ක්‍රියාව කරන්නේද, ඊටත් වඩා හොඳ

مِّنْ فَزَعٍ يَّوْمَئِذٍ اٰمِنُوْنَ ﴿٩٠﴾

තිළිණයක් ලබනු ඇත. එවැන්නන් එදින භීතියෙන් සුරක්ෂිත වනු ඇත.

وَمَنْ جَآءَ بِالسَّيِّئَةِ فَكُبَّتْ وُجُوْهُهُمْ فِى النَّارِ ۗ هَلْ تُجْزَوْنَ اِلَّا مَا كُنْتُمْ تَعْمَلُوْنَ ﴿٩١﴾

91. තවද කවුරුන් හෝ අයහපත් ක්‍රියා කරන්නේද ඔවුන්ගේ මුහුණු ගින්න තුළට මුණින් අතට දමනු ලබනු ඇත. 'නුඹලා කරමින් සිටි දේ හේතුවෙන් නුඹලාට ප්‍රතිවිපාකය දෙනු ලැබුවේ නොවේදැ?'යි (ඔවුනට කියනු ලබනු ඇත).

اِنَّمَآ اُمِرْتُ اَنْ اَعْبُدَ رَبَّ هٰذِهِ الْبَلْدَةِ الَّذِىْ حَرَّمَهَا وَلَهٗ كُلُّ شَىْءٍ ۖ وَّاُمِرْتُ اَنْ اَكُوْنَ مِنَ الْمُسْلِمِيْنَ ۙ﴿٩٢﴾

92. (පවසන්න), 'මම මෙම නගරයේ අධිපතියාණන්ට නැමදීමට පමණක් අණ කරන ලද්දෙමි. ඔහු එය පූජනීය බවට පත් කර ඇත. තවද සියළු දේ ඔහුටම අයත්ය. තවද මම (දෙවියන්ට) අවනත වන්නන්ගෙන් වීමට අණ කරන ලද්දෙමි'.

وَاَنْ اَتْلُوَا الْقُرْاٰنَ ۚ فَمَنِ اهْتَدٰى فَاِنَّمَا يَهْتَدِىْ لِنَفْسِهٖ ۚ وَمَنْ ضَلَّ فَقُلْ اِنَّمَآ اَنَا مِنَ الْمُنْذِرِيْنَ ﴿٩٣﴾

93. 'එමෙන්ම (මා) කුර්ආනය පාරායනය කිරීමටත්ය'. එබැවින් යමෙක් යහමග අනුගමනය කරන්නේද, ඔහු තමාගේ (යහපත) උදෙසා පමණක් අනුගමනය කරයි. එමෙන්ම යමෙක් නොමග යන්නේද (ඔහුට) 'මම අවවාද කරන්නෙකු පමණක් වෙමි'යි පවසන්න.

وَقُلِ الْحَمْدُ لِلّٰهِ سَيُرِيْكُمْ اٰيٰتِهٖ فَتَعْرِفُوْنَهَا ۗ وَمَا رَبُّكَ بِغَافِلٍ عَمَّا تَعْمَلُوْنَ ﴿٩٤﴾

94. තවද පවසන්න, 'සියළු ප්‍රශංසා අල්ලාහ්ට අයත්ය. ඔහු ඉක්මනින් ඔහුගේ සළකුණු නුඹලාට පෙන්වන්නේය. තවද නුඹලා ඒවා දැනගන්නෙහුමය'. තවද ඔබගේ අධිපතියාණන් නුඹලා කරන දේ පිළිබඳව නොවිමසිලිමත් නොවේ.



අල් කසස්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

طسٓمٓ ②

2. තා, සීන්, මීම්. ◆

تِلۡكَ ءَايَٰتُ ٱلۡكِتَٰبِ ٱلۡمُبِينِ ③

3. මේවා පැහැදිලි ග්‍රන්ථයේ වාක්‍යයන් වේ.

نَتۡلُواْ عَلَيۡكَ مِن نَّبَإِ مُوسَىٰ وَفِرۡعَوۡنَ بِٱلۡحَقِّ لِقَوۡمٖ يُؤۡمِنُونَ ④

4. විශ්වාස කරන ජනතාවගේ (යහපත) පිණිස අපි ඔබ හට මූසාගේ සහ ෆිර්අවුන්ගේ වෘතාන්තයෙන් (කොටසක්) කියා පෙන්වන්නෙමු.

إِنَّ فِرۡعَوۡنَ عَلَا فِي ٱلۡأَرۡضِ وَجَعَلَ أَهۡلَهَا شِيَعٗا يَسۡتَضۡعِفُ طَآئِفَةٗ مِّنۡهُمۡ يُذَبِّحُ أَبۡنَآءَهُمۡ وَيَسۡتَحۡيِۦ نِسَآءَهُمۡۚ إِنَّهُۥ كَانَ مِنَ ٱلۡمُفۡسِدِينَ ⑤

5. සැබැවින්ම ෆිර්අවුන් පොළොවෙහි උඩඟු ලෙස හැසිරුණේය. තවද එහි වූ ජනතාව කණ්ඩායම්වලට බෙදුවේය. ඔහු ඔවුන්ගෙන් එක් පිරිසක් දුර්වල කිරීමට තැත් කළේය. ඔවුන්ගේ පුතුන් ඝාතනය කරමින් ඔවුන්ගේ ස්ත්‍රීන්ව ජීවත් වීමට ඉඩ හැරියේය. නිශ්චිතවම ඔහු ආරවුල් ඇති කරන්නන්ගෙන් විය.

وَنُرِيدُ أَن نَّمُنَّ عَلَى ٱلَّذِينَ ٱسۡتُضۡعِفُواْ فِي ٱلۡأَرۡضِ وَنَجۡعَلَهُمۡ أَئِمَّةٗ وَنَجۡعَلَهُمُ ٱلۡوَٰرِثِينَ ⑥

6. තවද පොළොවෙහි දුර්වල යැයි සළකනු ලැබූ අයහට අපගේ අනුග්‍රහය දැක්වීමටත් ඔවුන්ව නායකයින් බවට පත් කිරීමටත් තවද ඔවුන්ව (අපගේ අනුග්‍රහයන්ට) උරුමක්කරුවන් බවට පත්කිරීමටත් අපි කැමති වූවෙමු.

وَنُمَكِّنَ لَهُمۡ فِي ٱلۡأَرۡضِ وَنُرِيَ فِرۡعَوۡنَ وَهَٰمَٰنَ وَجُنُودَهُمَا مِنۡهُم مَّا كَانُواْ يَحۡذَرُونَ ⑦

7. තවද පොළොවෙහි ඔවුන්ව (ඉස්රාඊලයේ දරුවන්ව) ස්ථාපිත කිරීමටත් එමෙන්ම ෆිර්අවුන්ටද හාමාන්ටද ඔවුන් දෙදෙනාගේ සේනාවන්ටද ඔවුන් (ඉස්රාඊලයේ දරුවන්) වෙතින් බිය වූ දේ පෙන්වා දීමටත්වේ.

◆ පරිශුද්ධය, සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

8. තවද, අපි මූසාගේ මව වෙත, 'ඔහුට කිරි පොවන්න. තවද ඔබ ඔහු සම්බන්ධයෙන් බියවන විට, ඔහුව ගඟට දමන්න. තවද බිය නොවන්න. කනස්සල්ලටද පත්නොවන්න. ඇත්තෙන්ම අපි ඔහුව ඔබ වෙත ආපසු ලබා දෙන්නෙමු. තවද ඔහුව දූතයන්ගෙන් (කෙනෙකු) කරන්නෙමු'යි (පවසමින්) අනාවරණය කළෙමු.

وَاَوْحَيْنَآ اِلٰٓى اُمِّ مُوْسٰٓى اَنْ اَرْضِعِيْهِ ۚ فَاِذَا خِفْتِ عَلَيْهِ فَاَلْقِيْهِ فِى الْيَمِّ وَلَا تَخَافِىْ وَلَا تَحْزَنِىْ ۚ اِنَّا رَآدُّوْهُ اِلَيْكِ وَجَاعِلُوْهُ مِنَ الْمُرْسَلِيْنَ ۝٨

9. තවද ෆිර්අවුන්ගේ පවුලේ අය, ඔහුව අහුලා ගත්හ. එය ඔවුනට ඔහු සතුරෙකුද ඔවුන්ගේ ශෝකයටද හේතුවක් වන්නට තිබෙන බව (නොදැන) සිටි නිසාය. සැබැවින්ම ෆිර්අවුන්ද හාමාන්ද ඔවුන්ගේ සේනාවන්ද වැරදිකරන්නන් වූහ.

فَالْتَقَطَهٗٓ اٰلُ فِرْعَوْنَ لِيَكُوْنَ لَهُمْ عَدُوًّا وَّحَزَنًا ۗ اِنَّ فِرْعَوْنَ وَهَامٰنَ وَجُنُوْدَهُمَا كَانُوْا خٰطِـِٕيْنَ ۝٩

10. තවද ෆිර්අවුන්ගේ බිරිඳ '(මොහු) මා හටත් ඔබ හටත් ඇසට සිසිලක් (වනු ඇත). මොහුව මරා නොදමනු. ඇතැම් විට මොහු අපට ප්‍රයෝජනවත් විය හැකිය. නැතහොත් මොහුව පුතෙකු ලෙස අපට හදා වඩා ගත හැකියැ'යි කීවාය. තවද ඔවුන් වටහා නොගත්හ.

وَقَالَتِ امْرَاَتُ فِرْعَوْنَ قُرَّتُ عَيْنٍ لِّيْ وَلَكَ ۗ لَا تَقْتُلُوْهُ ۖ عَسٰٓى اَنْ يَّنْفَعَنَآ اَوْ نَتَّخِذَهٗ وَلَدًا وَّهُمْ لَا يَشْعُرُوْنَ ۝١٠

11. තවද මූසාගේ මවගේ හදවත (බියෙන්) නිදහස් විය. ඇය (දැඩි) විශ්වාසීන අයගෙන් වනු පිණිස අප ඇයගේ හදවත ශක්තිමත් නොකර තිබුණා නම්, ඇය එය (එම රහස) එළිකරන්නට ඉඩ තිබුණි.

وَاَصْبَحَ فُؤَادُ اُمِّ مُوْسٰى فٰرِغًا ۗ اِنْ كَادَتْ لَتُبْدِيْ بِهٖ لَوْلَآ اَنْ رَّبَطْنَا عَلٰى قَلْبِهَا لِتَكُوْنَ مِنَ الْمُؤْمِنِيْنَ ۝١١

12. තවද ඇය ඔහුගේ සොහොයුරිය වෙත, 'ඔහු පසුපස යන්නැ'යි කීවාය. එම නිසා ඇය ඔහුගැන දුරින් සිට විපරමින් සිටියාය. තවද ඔවුන් නොදැන සිටියහ.

وَقَالَتْ لِاُخْتِهٖ قُصِّيْهِ ۖ فَبَصُرَتْ بِهٖ عَنْ جُنُبٍ وَّهُمْ لَا يَشْعُرُوْنَ ۝١٢

13. තවද අපි පෙරාතුවම, ඔහුගෙන් කිරි මව්වරුන්ව වැළැක්වීමට සැලැස්වූයෙමු. එබැවින් ඇය (මෙසේ) පැවසුවාය, 'නුඹලා වෙනුවෙන් ඔහුව ඇති දැඩි කරන තවද ඔහුගේ

وَحَرَّمْنَا عَلَيْهِ الْمَرَاضِعَ مِنْ قَبْلُ فَقَالَتْ هَلْ اَدُلُّكُمْ عَلٰٓى اَهْلِ بَيْتٍ يَّكْفُلُوْنَهٗ

لَكُمْ وَهُمْ لَهُۥ نَٰصِحُونَ ﴿١٣﴾

යහපත අවංකවම පතන්නාවූ නිවැසියන් වෙතට මා නුඹලාව යොමු කරන්නද?'

فَرَدَدْنَٰهُ إِلَىٰٓ أُمِّهِۦ كَىْ تَقَرَّ عَيْنُهَا وَلَا تَحْزَنَ وَلِتَعْلَمَ أَنَّ وَعْدَ ٱللَّهِ حَقٌّ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿١٤﴾

14. මෙලෙස අපි ඔහුගේ මව වෙත ඇයගේ ඇස් සිසිලස වනු පිණිසද, ඇය කනස්සල්ලට පත් නොවනු පිණිසද තවද අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය යැයි ඇය දැනගනු පිණිසද, ඔහුව ආපසු ලබා දුන්නෙමු. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

وَلَمَّا بَلَغَ أَشُدَّهُۥ وَٱسْتَوَىٰٓ ءَاتَيْنَٰهُ حُكْمًا وَعِلْمًا ۚ وَكَذَٰلِكَ نَجْزِى ٱلْمُحْسِنِينَ ﴿١٥﴾

15. තවද ඔහු තම (වයසෙහි) සම්පූර්ණව ශක්තිමත් වී මුහුකුරා ගිය අවස්ථාවට එළඹි කල්හි, අපි ඔහුට ප්‍රඥාවද දැනුමද ලබා දුනිමු. තවද මෙලෙස අපි යහපත කරන්නන්ට තිළිණ කරන්නෙමු.

وَدَخَلَ ٱلْمَدِينَةَ عَلَىٰ حِينِ غَفْلَةٍ مِّنْ أَهْلِهَا فَوَجَدَ فِيهَا رَجُلَيْنِ يَقْتَتِلَانِ هَٰذَا مِن شِيعَتِهِۦ وَهَٰذَا مِنْ عَدُوِّهِۦ ۖ فَٱسْتَغَٰثَهُ ٱلَّذِى مِن شِيعَتِهِۦ عَلَى ٱلَّذِى مِنْ عَدُوِّهِۦ فَوَكَزَهُۥ مُوسَىٰ فَقَضَىٰ عَلَيْهِ ۖ قَالَ هَٰذَا مِنْ عَمَلِ ٱلشَّيْطَٰنِ ۖ إِنَّهُۥ عَدُوٌّ مُّضِلٌّ مُّبِينٌ ﴿١٦﴾

16. තවද ඔහු නගරයට එහි ජනයා නින්දෙහි පසුවන විට පිවිසියේය. තවද ඔහු එහි මිනිසුන් දෙදෙනෙකු රණ්ඩු වනු දුටුවේය. කෙනෙක් ඔහුගේම සමූහයෙන්ය. තවද අනෙකා ඔහුගේ සතුරන්ගෙන්ය. තවද ඔහුගේ සමූහයට අයත් කෙනෙක් තම සතුරන්ගෙන් කෙනෙකුට විරුද්ධව ඔහුගෙන් පිහිට පැතුවේය. එවිට මූසා තම අත් මිටින් ඔහුට පහරක් දුන්නේය. (එමගින්) ඔහු මරුමුවට පත්විය. ඔහු, 'මෙය ෂෙයිතාන්ගේ ක්‍රියාවකි. ඇත්තෙන්ම ඔහු නොමග යවන්නාවූ ප්‍රකට සතුරෙකි'යි ඔහු පැවසුවේය.

قَالَ رَبِّ إِنِّى ظَلَمْتُ نَفْسِى فَٱغْفِرْ لِى فَغَفَرَ لَهُۥٓ ۚ إِنَّهُۥ هُوَ ٱلْغَفُورُ ٱلرَّحِيمُ ﴿١٧﴾

17. 'මාගේ අධිපතියාණෙනි, මම මාගේ ආත්මයට වැරදි කරගත්තෙමි. එබැවින් මාහට සමාව දෙන්නැ'යි ඔහු කීවේය. එබැවින් ඔහු ඔහුට සමාව දුන්නේය. ඔහු අති සමාන්විතය, පරම දයාබරය.

قَالَ رَبِّ بِمَآ أَنْعَمْتَ عَلَىَّ فَلَنْ أَكُونَ

18. 'මාගේ අධිපතියාණෙනි, ඔබ මා හට අනුග්‍රහය දැක්වූ බැවින් මා

ظَهِيْرًا لِّلْمُجْرِمِيْنَ ﴿١٨﴾

කිසිවිටෙකත් වරදකරුවන්හට උදව්කරුවෙකු නොවන්නෙමි'යි ඔහු කීවේය.

فَاَصْبَحَ فِى الْمَدِيْنَةِ خَآئِفًا يَّتَرَقَّبُ فَاِذَا الَّذِى اسْتَنْصَرَهٗ بِالْاَمْسِ يَسْتَصْرِخُهٗ ؕ قَالَ لَهٗ مُوْسٰٓى اِنَّكَ لَغَوِىٌّ مُّبِيْنٌ ﴿١٩﴾

19. එමෙන්ම ඔහු බිය මුසුවෙන්ද පරිකෂාකාරීවද (ඇවිද යමින්) නගරයෙහි තම දවස ආරම්භ කළේය. සැනකින්ම! පෙර දින ඔහුගෙන් උදව් පැතූ එම තැනැත්තා (නැවතත්) උදව් පතා ඔහුව හඬ ගැසුවේය. මූසා ඔහුට, 'ඇත්තෙන්ම නුඹ ප්‍රකට නොමග ගිය කෙනෙක්යැ'යි කීවේය.

فَلَمَّآ اَنْ اَرَادَ اَنْ يَّبْطِشَ بِالَّذِىْ هُوَ عَدُوٌّ لَّهُمَا ۙ قَالَ يٰمُوْسٰٓى اَتُرِيْدُ اَنْ تَقْتُلَنِىْ كَمَا قَتَلْتَ نَفْسًا بِالْاَمْسِ ۖ اِنْ تُرِيْدُ اِلَّآ اَنْ تَكُوْنَ جَبَّارًا فِى الْاَرْضِ وَمَا تُرِيْدُ اَنْ تَكُوْنَ مِنَ الْمُصْلِحِيْنَ ﴿٢٠﴾

20. තවද ඔවුන් දෙදෙනාටම සතුරු වූ කෙනෙකුව ඔහු අල්ලා ගැනීමට තීරණයකට බැසූ විට ඔහු (මෙසේ) කීවේය. 'එම්බල මූසා, ඔබ ඊයේ දින මිනිසෙකුව ඝාතනය කළ පරිදිම මා ඝාතනය කිරීමට අදහස් කරන්නෙහිද? ඔබ දේශයෙහි කෲර පාලකයෙකු වීමට පමණක් අදහස් කරනවා මිස සාමය ඇතිකරන්නෙකු වීමට නොවේ'.

وَجَآءَ رَجُلٌ مِّنْ اَقْصَا الْمَدِيْنَةِ يَسْعٰى ؗ قَالَ يٰمُوْسٰٓى اِنَّ الْمَلَاَ يَاْتَمِرُوْنَ بِكَ لِيَقْتُلُوْكَ فَاخْرُجْ اِنِّىْ لَكَ مِنَ النّٰصِحِيْنَ ﴿٢١﴾

21. තවද එම නගරයේ ඈත කෙළවරකින් මිනිසෙක් දුවගෙනැවිත්, 'එම්බල මූසා, සත්තකින්ම ප්‍රධානීන් ඔබව මරා දැමීමට ඔබට එරෙහිව එක්ව උපදෙස් ගන්නෝය. එමනිසා ඔබ පලායන්න. නියතවශයෙන්ම මා ඔබගේ යහපත පතන්නන්ගෙන් වෙමි'යි කීවේය.

فَخَرَجَ مِنْهَا خَآئِفًا يَّتَرَقَّبُ ؗ قَالَ رَبِّ نَجِّنِىْ مِنَ الْقَوْمِ الظّٰلِمِيْنَ ﴿٢٢﴾

22. එබැවින් ඔහු බියෙන් යුතුවද පරිකෂාකාරීවද එහිසිට පිටත්ව ගියේය. 'මාගේ අධිපතියාණෙනි! අයුක්ති සහගත ජනයාගෙන් මා මුදවා ගනිත්වා'යි ඔහු කීවේය.

وَلَمَّا تَوَجَّهَ تِلْقَآءَ مَدْيَنَ قَالَ عَسٰى

23. තවද ඔහු තම අවධානය මද්යන් දෙසට යොමු කළ විට, ඔහු, 'මාගේ

رَبِّيۡۤ اَنۡ يَّهۡدِيَنِىۡ سَوَآءَ السَّبِيۡلِ ﴿٢٣﴾

අධිපතියාණන් මා යහමගට යොමු කරනු ඇතැයි මා බලාපොරොත්තු වෙමි'යි කීවේය.

وَلَمَّا وَرَدَ مَآءَ مَدۡيَنَ وَجَدَ عَلَيۡهِ اُمَّةً مِّنَ النَّاسِ يَسۡقُوۡنَ ۖ وَوَجَدَ مِنۡ دُوۡنِهِمُ امۡرَاَتَيۡنِ تَذُوۡدٰنِ‌ ۚ قَالَ مَا خَطۡبُكُمَا‌ ؕ قَالَتَا لَا نَسۡقِىۡ حَتّٰى يُصۡدِرَ الرِّعَآءُ‌ ٚ وَاَبُوۡنَا شَيۡخٌ كَبِيۡرٌ ﴿٢٤﴾

24. තවද, ඔහු මද්යන්හි ජලාශයට පැමිණි කල්හි, මිනිසුන් පිරිසක් (ඔවුන්ගේ ගවසතුන් රැලට) දිය සපයනු ඔහු දුටුවේය. තවද, ඔවුන් පසුපස ස්ත්‍රීන් දෙදෙනෙකු (තමන්ගේ ගවසතුන් රැල) පසෙක තබා සිටිනු ඔහු දුටුවේය. ඔහු, 'නුඹලාගේ කාරණාව කුමක්ද?'යි ඇසුවේය. ඔවුහු, 'එඬේරුන්, (ඔවුන්ගේ ගවසතුන් රැල) ඉවත් කරගන්නා තුරු අපට (අපගේ ගවසතුන් රැලට) දිය සැපයිය නොහැක. තවද, අපගේ පියා ඉතා වයෝවෘධයෙකි'යි පිළිතුරු දුන්හ.

فَسَقٰى لَهُمَا ثُمَّ تَوَلّٰۤى اِلَى الظِّلِّ فَقَالَ رَبِّ اِنِّىۡ لِمَاۤ اَنۡزَلۡتَ اِلَىَّ مِنۡ خَيۡرٍ فَقِيۡرٌ ﴿٢٥﴾

25. එබැවින් ඔහු, (ඔවුන්ගේ ගවසතුන් රැලට) දිය සපයා දුන්නේය. පසුව ඔහු පසෙකට හැරී සෙවනකට වී, 'මාගේ අධිපතියාණෙනි! ඔබ කුමන යහපත් දෙයක් මා හට පිරිනැමුවද, මා එයට බැගෑපත්ව යදින්නෙක්මි'යි කීවේය.

فَجَآءَتۡهُ اِحۡدٰٮهُمَا تَمۡشِىۡ عَلَى اسۡتِحۡيَآءٍ‌ قَالَتۡ اِنَّ اَبِىۡ يَدۡعُوۡكَ لِيَجۡزِيَكَ اَجۡرَ مَا سَقَيۡتَ لَـنَا‌ ؕ فَلَمَّا جَآءَهٗ وَقَصَّ عَلَيۡهِ الۡقَصَصَ ۙ قَالَ لَا تَخَفۡ‌ ۖ نَجَوۡتَ مِنَ الۡقَوۡمِ الظّٰلِمِيۡنَ ﴿٢٦﴾

26. තවද, (ස්ත්‍රීන්) දෙදෙනාගෙන් එක් තැනැත්තියක් ලැජ්ජාශීලිව ඇවිදගෙන ඔහු වෙත පැමිණ, 'ඔබ අප වෙනුවෙන් (අපගේ ගවසතුන් රැලට) දිය සැපයූ බැවින්, මාගේ පියා ඔබට තිළිණය ලබා දීමට ඔබව කැඳවන්නේය'යි ඇය පැවසුවාය. එබැවින් ඔහු, හෙතෙම වෙතට ගොස් ඔහුගේ වෘතාන්තය හෙතෙමට පැවසූ විට හෙතෙම, 'බිය නොවන්න. ඔබ අදමිටු ජනයාගෙන් මිදුණේය'යි කීවේය.

قَالَتۡ اِحۡدٰٮهُمَا يٰۤاَبَتِ اسۡتَاْجِرۡهُ‌ ۖ اِنَّ خَيۡرَ مَنِ اسۡتَاْجَرۡتَ الۡقَوِىُّ الۡاَمِيۡنُ ﴿٢٧﴾

27. (ස්ත්‍රීන්) දෙදෙනාගෙන් එක් තැනැත්තියක්, 'මාගේ පියාණෙනි! ඔහුව සේවකයෙකු ලෙස යොදාගන්න. ඇත්තෙන්ම ඔබ සේවකයෙකු ලෙස යොදාගන්නන්ගෙන් වඩා හොඳ මිනිසා ඉතා ශක්තිමත් සහ විශ්වාසදායක තැනැත්තායැ'යි කීවාය.

قَالَ إِنِّيٓ أُرِيدُ أَنۡ أُنكِحَكَ إِحۡدَى ٱبۡنَتَيَّ هَٰتَيۡنِ عَلَىٰٓ أَن تَأۡجُرَنِي ثَمَٰنِيَ حِجَجٖۖ فَإِنۡ أَتۡمَمۡتَ عَشۡرٗا فَمِنۡ عِندِكَۖ وَمَآ أُرِيدُ أَنۡ أَشُقَّ عَلَيۡكَۚ سَتَجِدُنِيٓ إِن شَآءَ ٱللَّهُ مِنَ ٱلصَّٰلِحِينَ ٢٨

28. ඔහු (මූසාට මෙසේ) පැවසුවේය, 'ඔබ සේවකයෙකු ලෙස මා හට වසර අටක් සේවය කිරීමේ කොන්දේසිය පිට මාගේ මේ දියණියන් දෙදෙනාගෙන් එක් තැනැත්තියකුව ඔබ හට විවාහ කර දීමට මා අදහස් කරන්නෙමි. නමුත් ඔබ (වසර) දහයක් සම්පූර්ණ කරන්නේ නම් එය ඔබේම කැමැත්ත පරිදි වනු ඇත. තවද මම ඔබහට කිසිදු දුෂ්කරතාවයක් දීමට නොකැමැත්තෙමි. අල්ලාහ් අභිමත වූයේ නම් මා ධාර්මිෂ්ඨකයින්ගෙන් බව ඔබ දකිනු ඇත'.

قَالَ ذَٰلِكَ بَيۡنِي وَبَيۡنَكَۖ أَيَّمَا ٱلۡأَجَلَيۡنِ قَضَيۡتُ فَلَا عُدۡوَٰنَ عَلَيَّۖ وَٱللَّهُ عَلَىٰ مَا نَقُولُ وَكِيلٞ ٢٩

29. 'මෙය මා හා ඔබ අතර තීරණය වී ඇත. කොන්දේසි දෙකෙන් කුමන එකක් මා ඉෂ්ඨ කළද, මා හට කිසිදු අසාධාරණයක් නොවිය යුතුය. තවද අල්ලාහ් අප පවසන දෙයට සාක්ෂි යැ'යි ඔහු (මූසා) කීවේය.

فَلَمَّا قَضَىٰ مُوسَى ٱلۡأَجَلَ وَسَارَ بِأَهۡلِهِۦٓ ءَانَسَ مِن جَانِبِ ٱلطُّورِ نَارٗاۖ قَالَ لِأَهۡلِهِ ٱمۡكُثُوٓاْ إِنِّيٓ ءَانَسۡتُ نَارٗا لَّعَلِّيٓ ءَاتِيكُم مِّنۡهَا بِخَبَرٍ أَوۡ جَذۡوَةٖ مِّنَ ٱلنَّارِ لَعَلَّكُمۡ تَصۡطَلُونَ ٣٠

30. තවද මූසා කාල වකවානුව පරිපූර්ණ කර තම පවුලේ අය සමග ගමනේ යෙදී සිටි විට, (තූර්) කන්ද දෙස ගින්නක් තිබෙනු ඔහුට වැටහුණි. ඔහු තම පවුලේ අය වෙත, 'නවතිනු, මා හට ගින්නක් පෙනෙන්නේය. ඇතැම් විට ඔබලා හට (ප්‍රයෝජනවත්) තොරතුරක් ගෙන ඒමට හෝ ඔබලා ගිනි තපින්නට ගිනි පෙනෙල්ලක් හෝ ගෙන ඒමට මා හට හැකියැ'යි පැවසුවේය.

فَلَمَّآ أَتَىٰهَا نُودِيَ مِن شَٰطِيِٕ ٱلۡوَادِ ٱلۡأَيۡمَنِ فِي ٱلۡبُقۡعَةِ ٱلۡمُبَٰرَكَةِ مِنَ ٱلشَّجَرَةِ أَن يَٰمُوسَىٰٓ إِنِّيٓ أَنَا ٱللَّهُ رَبُّ ٱلۡعَٰلَمِينَ ٣١

31. තවද ඔහු එය වෙත පැමිණි විට ආශිර්වාදිත ස්ථානයේ නිම්නයට දකුණු පසින් වූ ගසකින්, ඔහුව (මෙසේ) අමතන ලදී. 'එම්බල මූසා නියතවශයෙන්ම සකල ලෝකයන්ටම අධිපතියාණන් වන මම අල්ලාහ් වෙමි'.

وَأَنۡ أَلۡقِ عَصَاكَۖ فَلَمَّا رَءَاهَا تَهۡتَزُّ

32. තවද, 'ඔබගේ සැරයටිය විසිකරන්න' තවද ඔහු එය නළියන

كَأَنَّهَا جَآنٌّ وَّلّٰى مُدۡبِرًا وَّلَمۡ يُعَقِّبۡ ؕ يٰمُوۡسٰۤى اَقۡبِلۡ وَلَا تَخَفۡ ۗ اِنَّكَ مِنَ الۡاٰمِنِيۡنَ ﴿۳۲﴾

සර්පයෙකු මෙන් දුටු විට, ඔහු පසු බසිමින් ආපසු හැරී ගියේය. නොනැවතුණේය. 'එම්බල මූසා ඉදිරියට එන්න. තවද බිය නොවන්න. නියතවශයෙන්ම ඔබ ආරක්ෂිතයින්ගෙන් වන්නෙහිය'.

اُسۡلُكۡ يَدَكَ فِىۡ جَيۡبِكَ تَخۡرُجۡ بَيۡضَآءَ مِنۡ غَيۡرِ سُوۡٓءٍ وَّاضۡمُمۡ اِلَيۡكَ جَنَاحَكَ مِنَ الرَّهۡبِ فَذٰنِكَ بُرۡهَانٰنِ مِنۡ رَّبِّكَ اِلٰى فِرۡعَوۡنَ وَمَلَا۟ئِهٖ ؕ اِنَّهُمۡ كَانُوۡا قَوۡمًا فٰسِقِيۡنَ ﴿۳۳﴾

33. 'ඔබගේ අත ඔබගේ කිහිල්ල තුළට දමන්න. එය නපුරු (දෑයින්) තොරව සුදට එළියට එනු ඇත. තවද බියෙන් (මිදීමට) ඔබගේ අත ඔබවෙත බැඳ තබාගන්න. එබැවින් මේවා ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් හට ඔබ අධිපතියාණන් වෙතින් වන සාධකයන් දෙකකි. නියතවශයෙන්ම ඔවුන් කළහකාරී ජනතාවකි'.

قَالَ رَبِّ اِنِّىۡ قَتَلۡتُ مِنۡهُمۡ نَفۡسًا فَاَخَافُ اَنۡ يَّقۡتُلُوۡنِ ﴿۳۴﴾

34. ඔහු (මූසා), 'මාගේ අධිපතියාණෙනි! ඔවුන්ගෙන් එක් පුද්ගලයෙකුව මම මරා දැමුවෙමි. තවද ඔවුන් මාව මරා දමනු ඇතැයි බිය වන්නෙමි'යි කීවේය.

وَاَخِىۡ هٰرُوۡنُ هُوَ اَفۡصَحُ مِنِّىۡ لِسَانًا فَاَرۡسِلۡهُ مَعِىَ رِدۡاً يُّصَدِّقُنِىۡۤ ۖ اِنِّىۡۤ اَخَافُ اَنۡ يُّكَذِّبُوۡنِ ﴿۳۵﴾

35. 'තවද මාගේ සොහොයුරු හාරූන්, ඔහු කථනයෙහි මට වඩා දක්ෂය. එබැවින් ඔහු මාගේ සත්‍යයට සාක්ෂි දරනු පිණිස ඔහුව උදව්කරුවෙකු ලෙස මා සමග එවනු මැනව. මා මුසාවාදියෙකු ලෙසින් ඔවුන් මට චෝදනා නගනු ඇතැයි මා බිය වෙමි'.

قَالَ سَنَشُدُّ عَضُدَكَ بِاَخِيۡكَ وَنَجۡعَلُ لَـكُمَا سُلۡطٰنًا فَلَا يَصِلُوۡنَ اِلَيۡكُمَا ۚ بِاٰيٰتِنَآ ۚ اَنۡتُمَا وَمَنِ اتَّبَعَكُمَا الۡغٰلِبُوۡنَ ﴿۳۶﴾

معانقة عند المتأخرين

36. 'අපි ඔබගේ සොහොයුරු මගින් ඔබගේ බාහු (බලය) ශක්තිමත් කරන්නෙමු. තවද ඔවුන් ඔබලා වෙත සමීප වීමට නොහැකි වනු පිණිස අපි ඔබ දෙදෙනාට බලය ලබා දෙන්නෙමු. අපගේ සළකුණු සමග (යනු). ඔබ දෙදෙනාද ඔබලාව අනුගමනය කරන අයද ජයග්‍රාහීන් වනු ඇතැ'යි (අල්ලාහ්) පැවසුවේය.

37. තවද මූසා අපගේ පැහැදිලි සළකුණු සමග ඔවුන් වෙතට පැමිණි කල්හි ඔවුන්, 'මෙය උපායගිලිව යොදවන ලද මායා ජාලයක් මිස අන් කිසිවක් නොවේ. තවද (මෙවැනි දේ) මීට පෙර කිසිවිටෙකත් අපගේ මුතුන්මිත්තන් අතරද අපි අසා නැත්තෙමු'යි පැවසූහ.

فَلَمَّا جَآءَهُم مُّوسَىٰ بِـَٔايَٰتِنَا بَيِّنَٰتٍ قَالُوا۟ مَا هَٰذَآ إِلَّا سِحْرٌ مُّفْتَرًى وَمَا سَمِعْنَا بِهَٰذَا فِىٓ ءَابَآئِنَا ٱلْأَوَّلِينَ ﴿٣٧﴾

38. 'මාගේ අධිපතියාණන්, ඔහු වෙතින් මගපෙන්වීම ගෙන ආවේ කවුරුන්ද යන්නත්, පරලෝ වාසස්ථානයේ තිළිණය ලබන්නේ කවුරුන්ද යන්නත් ඉතා මැනැවින් දනියි. සැබැවින්ම වැරදි කරන්නන් කිසිවිටෙකත් ජයග්‍රහණය නොකරන්නේයැ'යි මූසා කීවේය.

وَقَالَ مُوسَىٰ رَبِّىٓ أَعْلَمُ بِمَن جَآءَ بِٱلْهُدَىٰ مِنْ عِندِهِۦ وَمَن تَكُونُ لَهُۥ عَٰقِبَةُ ٱلدَّارِ ۖ إِنَّهُۥ لَا يُفْلِحُ ٱلظَّٰلِمُونَ ﴿٣٨﴾

39. තවද ෆිර්අවුන්, 'එම්බල ප්‍රධානියනි! නුඹලාට මා හැර අන් දෙවියෙකු ගැන මා නොදනිමි. එබැවින් එම්බා හාමාන්! මා හට මැටියෙන් (ගඩොල්) පුළුස්සනු. තවද මා හට කුළුණක් සාදනු. මන්ද මා හට මූසාගේ දෙවියන් වෙත මඳ බැල්මක් හෙළීමට හැකිවනු ඇත. තවද මා ඔහුව මුසාවාදීන්ගෙන් කෙනෙකු යැයි සලකන්නෙමි'යි කීවේය.

وَقَالَ فِرْعَوْنُ يَٰٓأَيُّهَا ٱلْمَلَأُ مَا عَلِمْتُ لَكُم مِّنْ إِلَٰهٍ غَيْرِى فَأَوْقِدْ لِى يَٰهَٰمَٰنُ عَلَى ٱلطِّينِ فَٱجْعَل لِّى صَرْحًا لَّعَلِّىٓ أَطَّلِعُ إِلَىٰٓ إِلَٰهِ مُوسَىٰ وَإِنِّى لَأَظُنُّهُۥ مِنَ ٱلْكَٰذِبِينَ ﴿٣٩﴾

40. තවද ඔහු සහ ඔහුගේ සේනාවන් කිසිදු යුක්තිසහගතයෙන් තොරව භූමියෙහි උඩඟුලෙස හැසිරුණහ. තවද කිසිවිටෙකත් අප වෙත ඔවුන් ආපසු එනු නොලබන්නේ යැයි ඔවුන් සිතූහ.

وَٱسْتَكْبَرَ هُوَ وَجُنُودُهُۥ فِى ٱلْأَرْضِ بِغَيْرِ ٱلْحَقِّ وَظَنُّوٓا۟ أَنَّهُمْ إِلَيْنَا لَا يُرْجَعُونَ ﴿٤٠﴾

41. එබැවින් අපි, ඔහුවද ඔහුගේ සේනාවන්වද හසුකර ඔවුන්ව මුහුදට විසි කළෙමු. එසේනම්, වැරදිකරන්නන්ගේ අවසානය කෙතරම් (නපුරු) වූයේ දැයි බලනු!

فَأَخَذْنَٰهُ وَجُنُودَهُۥ فَنَبَذْنَٰهُمْ فِى ٱلْيَمِّ ۖ فَٱنظُرْ كَيْفَ كَانَ عَٰقِبَةُ ٱلظَّٰلِمِينَ ﴿٤١﴾

42. තවද අපි ඔවුන්ව ගින්න වෙතට කැඳවන නායකයින් බවට පත්

وَجَعَلْنَٰهُمْ أَئِمَّةً يَدْعُونَ إِلَى ٱلنَّارِ ۖ وَيَوْمَ

කළෙමු. තවද පුනරුත්ථාන දිනයේදී ඔවුන් කිසිදු උදව්වක් නොලබනු ඇත.

الْقِيٰمَةِ لَا يُنْصَرُوْنَ ﴿٤٢﴾

43. තවද අපි ඔවුන්ව මෙලොවෙහි ශාපය ලුහු බැඳීමට සැලැස්වුවෙමු. තවද පුනරුත්ථාන දිනයේදී (සියළු) යහපත් දේ අහිමි වූ අය අතර ඔවුන් සිටිනු ඇත.

وَاَتْبَعْنٰهُمْ فِيْ هٰذِهِ الدُّنْيَا لَعْنَةً ۚ وَيَوْمَ الْقِيٰمَةِ هُمْ مِّنَ الْمَقْبُوْحِيْنَ ﴿٤٣﴾ ع

44. තවද අපි පෙර සිටි පරම්පරාවන් විනාශ කළ පසු, මිනිසුන්ට අධ්‍යාත්මික දැක්මක් ලෙසද, මගපෙන්වීමක් ලෙසද දයාවක් ලෙසද ඔවුන් මෙනෙහි කිරීම පිණිස අපි මූසාට පුස්තකය දුන්නෙමු.

وَلَقَدْ اٰتَيْنَا مُوْسَى الْكِتٰبَ مِنْۢ بَعْدِ مَاۤ اَهْلَكْنَا الْقُرُوْنَ الْاُوْلٰى بَصَاۤىِٕرَ لِلنَّاسِ وَهُدًى وَّرَحْمَةً لَّعَلَّهُمْ يَتَذَكَّرُوْنَ ﴿٤٤﴾

45. තවද අපි මූසාට අණපනත් අනාවරණය කළ අවස්ථාවේදී ඔබ (තූර් කන්දෙහි) බටහිර දෙස නොසිටියෙහිය. එමෙන්ම ඔබ සාක්ෂිකරුවන් අතරද නොසිටියෙහිය.

وَمَا كُنْتَ بِجَانِبِ الْغَرْبِيِّ اِذْ قَضَيْنَاۤ اِلٰى مُوْسَى الْاَمْرَ وَمَا كُنْتَ مِنَ الشّٰهِدِيْنَ ۙ ﴿٤٥﴾

46. නමුත් අපි (මූසාට පසු) පරම්පරාවන් ඇති කළෙමු. තවද ජීවිත කාලය ඔවුනට දීර්ඝ විය. තවද අපගේ සළකුණු ඔවුනට කියා පෙන්වමින් ඔබ මද්යන්හි ජනතාව අතර වාසය කරන්නෙක්ද නොවීය. නමුත් දූතයින් යැව්වේ අපිමය.

وَلٰكِنَّاۤ اَنْشَاْنَا قُرُوْنًا فَتَطَاوَلَ عَلَيْهِمُ الْعُمُرُ ۚ وَمَا كُنْتَ ثَاوِيًا فِيْۤ اَهْلِ مَدْيَنَ تَتْلُوْا عَلَيْهِمْ اٰيٰتِنَا ۙ وَلٰكِنَّا كُنَّا مُرْسِلِيْنَ ﴿٤٦﴾

47. තවද අපි (මූසාව) කැඳවූ කල්හි ඔබ (තූර්) කන්ද අයිනෙහි නොසිටියෙහිය. නමුත් මීට පෙර අවවාද කරන්නෙකු නොපැමිණි ජනතාවකට ඔබ අවවාද කරනු පිණිසද, ඔවුන් මෙනෙහි කරනු පිණිසද, ඔබගේ අධිපතියාණන්ගෙන් දයාවක් ලෙස (අපි ඔබව යැව්වෙමු.)

وَمَا كُنْتَ بِجَانِبِ الطُّوْرِ اِذْ نَادَيْنَا وَلٰكِنْ رَّحْمَةً مِّنْ رَّبِّكَ لِتُنْذِرَ قَوْمًا مَّاۤ اَتٰىهُمْ مِّنْ نَّذِيْرٍ مِّنْ قَبْلِكَ لَعَلَّهُمْ يَتَذَكَّرُوْنَ ﴿٤٧﴾

48. තවද තමන්ගේම ක්‍රියාවන්හි ප්‍රතිඵලයක් ලෙස ඔවුනට විපතක් අත්වන විට, 'අපගේ අධිපතියාණෙනි! අපට ඔබගේ සළකුණු අනුගමනය

وَلَوْلَاۤ اَنْ تُصِيْبَهُمْ مُّصِيْبَةٌۢ بِمَا قَدَّمَتْ اَيْدِيْهِمْ فَيَقُوْلُوْا رَبَّنَا لَوْلَاۤ اَرْسَلْتَ اِلَيْنَا

رَسُوْلًا فَنَتَّبِعَ اٰيٰتِكَ وَنَكُوْنَ مِنَ الْمُؤْمِنِيْنَ ﴿٤٨﴾

*කරන්නටත් විශ්වාසිත අයගෙන් වන්නටත් ඔබ අප වෙත ඔබගේ දූතයෙකු නොඑව්වේ මන්දැ?'යි ඔවුන් නොකියනු පිණිස (අපි ඔබව එවා ඇත්තෙමු).

فَلَمَّا جَآءَهُمُ الْحَقُّ مِنْ عِنْدِنَا قَالُوْا لَوْلَآ اُوْتِيَ مِثْلَ مَآ اُوْتِيَ مُوْسٰى ؕ اَوَلَمْ يَكْفُرُوْا بِمَآ اُوْتِيَ مُوْسٰى مِنْ قَبْلُ ۚ قَالُوْا سِحْرٰنِ تَظٰهَرَا ۟ وَقَالُوْۤا اِنَّا بِكُلٍّ كٰفِرُوْنَ ﴿٤٩﴾

*49. නමුත් අපගෙන් සත්‍යය ඔවුන් හට පැමිණි කල්හි ඔවුන්, 'මූසාට දෙන ලද දේ මෙන් දෙයක් ඔහුටත් නොදෙන ලද්දේ මන්දැ?'යි කීහ. 'මීට පෙර මූසාට දෙන ලද දේ ඔවුන් ප්‍රතික්ෂේප කළා නොවේද? (හුදෙක්) එකිනෙකාට උදව් කරන මේ විජ්ජාකරුවන් දෙදෙනායැ'යි ඔවුහු කීහ. තවද ඔවුහු, 'අපි සියල්ලන්වම ප්‍රතික්ෂේප කරමු'යි කීහ.

قُلْ فَاْتُوْا بِكِتٰبٍ مِّنْ عِنْدِ اللّٰهِ هُوَ اَهْدٰى مِنْهُمَاۤ اَتَّبِعْهُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٥٠﴾

50. පවසන්න, 'නුඹලා සත්‍යවාදීන් නම් මේ (තව්රාත් සහ කුර්ආන්) දෙකට වඩා හොඳ මගපෙන්වීමක් වන ග්‍රන්ථයක්, මා එය අනුගමනය කරනු පිණිස අල්ලාහ්ගෙන් ගෙන එනු'.

فَاِنْ لَّمْ يَسْتَجِيْبُوْا لَكَ فَاعْلَمْ اَنَّمَا يَتَّبِعُوْنَ اَهْوَآءَهُمْ ؕ وَمَنْ اَضَلُّ مِمَّنِ اتَّبَعَ هَوٰىهُ بِغَيْرِ هُدًى مِّنَ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ لَا يَهْدِي الْقَوْمَ الظّٰلِمِيْنَ ﴿٥١﴾ ع ٨

51. නමුත් ඔවුන් ඔබට පිළිතුරු නොදෙන්නේ නම්, ඔවුන් තමන්ගේ නපුරු අභිලාෂයන් පමණක් අනුගමනය කරන බව දැන ගන්න. තවද අල්ලාහ්ගෙන් කිසිදු මගපෙන්වීමකින් තොරව තම නපුරු අභිලාෂයන් අනුගමනය කරන අයට වඩා නොමග ගිය අය කවුරුන්ද? සැබැවින්ම අල්ලාහ් අදමිටු ජනතාවට මග නොපෙන්වයි.

*සටහන. 48: මෙම ප්‍රශ්ණයට පිළිතුරු ලෙස අදහස් කරනුයේ ඔවුනට අල්ලාහ්ට එරෙහිව වරද පැටවිය නොහැක්කේ මන්දයත් දෙවියන් සැමවිටම ජනතාවට ඔවුන්ගේ වැරදි ක්‍රියාවලට දඬුවම් කිරීමට පෙර ඔවුන් වෙත අවවාද කරන්නන් යවන බැවිනි.
(පරිච්ඡේදය 6 වාක්‍යය 132 බලන්න)

*සටහන. 49: ඉස්ලාම් ධර්මයෙහි ප්‍රධාන විරුද්ධවාදීන් තුනක් වන යුදෙව්වන්, ක්‍රිස්තියානුවන් සහ ප්‍රතිමාපුදන්නන් යන අය අතුරින්, මෙම වාක්‍යයේ යුදෙව්වන් හට අමතන ලදී. මෙම ප්‍රකාශය යුදෙව්වන් විසින් පමණක් කරන්නට ඉඩ ඇත. මීටපෙර මූසාට දුන් දේ ඔවුන් ප්‍රතික්ෂේප කළ බව කුර්ආන් සඳහන් කරන විට, එය ඉස්ලාම්හි ශුද්ධ වූ වක්තෘවරයාගේ කාලයේ සිටි ජනයා මූසාව ප්‍රතික්ෂේප කළ බවට අදහස් නොකෙරේ. මෙම වාක්‍යයෙහි කොටසක් වන 'අපි සියල්ලන්වම ප්‍රතික්ෂේප කරමු' යන්නෙන් අදහස් කරන්නේ දෙවියන්ගේ නාමයෙන් මෙකී සළකුණු සමග පැමිණෙන්නාවූ සියල්ලන්වම අපි ප්‍රතික්ෂේප කරන්නෙමු යන්නය. මෙය, තමන්ගේ කාලයෙහි වක්තෘන්ව ප්‍රතික්ෂේප කරන්නාවූ රෝගය ඔවුන් සියල්ලටම පොදුවූ රෝගයක් බව මෙහිදී දැක්වේ.

وَلَقَدْ وَصَّلْنَا لَهُمُ الْقَوْلَ لَعَلَّهُمْ يَتَذَكَّرُونَ ﴿٥٢﴾

52. තවද, ඔවුන් අනුශාසනාව ලබනු පිණිස ඇත්තෙන්ම අපි ඔවුනට පණිවිඩය මනාව දැන්වූයෙමු.

الَّذِينَ آتَيْنَاهُمُ الْكِتَابَ مِن قَبْلِهِ هُم بِهِ يُؤْمِنُونَ ﴿٥٣﴾

53. අප කවුරුන්ට මීට පෙර පුස්තකය දුන්නේද ඔවුහු මෙය කෙරෙහි විශ්වාස කරති.

وَإِذَا يُتْلَىٰ عَلَيْهِمْ قَالُوا آمَنَّا بِهِ إِنَّهُ الْحَقُّ مِن رَّبِّنَا إِنَّا كُنَّا مِن قَبْلِهِ مُسْلِمِينَ ﴿٥٤﴾

54. තවද, ඔවුනට මෙය පාරායනය කරනු ලබන විට ඔවුන්, 'අපි මෙය විශ්වාස කරන්නෙමු. සැබැවින්ම මෙය අපගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යයකි. ඇත්තෙන්ම මෙයට පෙරද අපි (දෙවියන්ට) අවනත වී ඇත්තෙමු'යි පවසති.

أُولَٰئِكَ يُؤْتَوْنَ أَجْرَهُم مَّرَّتَيْنِ بِمَا صَبَرُوا وَيَدْرَءُونَ بِالْحَسَنَةِ السَّيِّئَةَ وَمِمَّا رَزَقْنَاهُمْ يُنفِقُونَ ﴿٥٥﴾

55. මොවුනට තමන්ගේ තිළිණය දෙවතාවක් දෙනු ලබන්නේය. මන්ද, මොවුන් ඉවසිලිමත්ව සිටිමින්, නපුර යහපත මගින් වැළැක්වූ නිසාය. තවද, අප මොවුනට දුන් දෙයින් වැය කරති.

وَإِذَا سَمِعُوا اللَّغْوَ أَعْرَضُوا عَنْهُ وَقَالُوا لَنَا أَعْمَالُنَا وَلَكُمْ أَعْمَالُكُمْ سَلَامٌ عَلَيْكُمْ لَا نَبْتَغِي الْجَاهِلِينَ ﴿٥٦﴾

56. තවද, ඔවුනට නිෂ්ඵල කථා ඇසුන විට, ඔවුහු එයින් ඉවත හැරී යන්නෝය. තවද, ඔවුහු, 'නුඹලාට නුඹලාගේ ක්‍රියාවන් අපට අපගේ ක්‍රියාවන්ය. නුඹලාට සාමය අත් වේවා. අපි අඥානයින්(ඇසුරිකිරීම)ට කැමති නොවෙමු'යි පවසන්නෝය.

إِنَّكَ لَا تَهْدِي مَنْ أَحْبَبْتَ وَلَٰكِنَّ اللَّهَ يَهْدِي مَن يَشَاءُ ۚ وَهُوَ أَعْلَمُ بِالْمُهْتَدِينَ ﴿٥٧﴾

57. නියතවශයෙන්ම ඔබ ප්‍රිය කරන (සියළු)අයට මගපෙන්වන්නට ඔබට නොහැකි වන්නේය. නමුත් අල්ලාහ් තමන් අභිමත කරන කෙනෙකුට මග පෙන්වන්නේය. තවද, මගපෙන්වීම් ලද්දන් කවුරුන්දැයි ඔහු මැනැවින් දන්නේය.

وَقَالُوا إِن نَّتَّبِعِ الْهُدَىٰ مَعَكَ نُتَخَطَّفْ مِنْ أَرْضِنَا ۚ أَوَلَمْ نُمَكِّن لَّهُمْ حَرَمًا

58. තවද, ඔවුහු, 'අප ඔබ සමග මග පෙන්වීම අනුගමනය කරන්නේ නම්, අපගේ භූමියෙන් අපි පැහැරගනු ලබන්නෙමු'යි පවසති. අපගෙන් වන ජිවනෝපායක් (ලෙස) සියළු දෑයෙහි

اَمِنًا يُّجْبٰٓى اِلَيْهِ ثَمَرٰتُ كُلِّ شَىْءٍ رِّزْقًا مِّنْ لَّدُنَّا وَلٰكِنَّ اَكْثَرَهُمْ لَا يَعْلَمُوْنَ ﴿٥٧﴾

පළතුරු ගෙන එනු ලබන්නාවූ ආරක්ෂිත අභය භූමියක් අපි ඔවුන් වෙනුවෙන් ස්ථාපිත නොකළෙමුද? නමුත් ඔවුන්ගෙන් වැඩි දෙනෙක් නොදනිති.

وَكَمْ اَهْلَكْنَا مِنْ قَرْيَةٍۢ بَطِرَتْ مَعِيْشَتَهَا ۚ فَتِلْكَ مَسٰكِنُهُمْ لَمْ تُسْكَنْ مِّنْۢ بَعْدِهِمْ اِلَّا قَلِيْلًا ۗ وَكُنَّا نَحْنُ الْوٰرِثِيْنَ ﴿٥٨﴾

59. තම ජීවන (රටාවෙහි) අතිශයින්ම ප්‍රීතිමත් වූ කෙතරම් ජනාවාස අපි විනාශ කළෙමුද? ඔවුන්ගේ වාසස්ථානයන් මේවාය. ඔවුන්ට පසුව ස්වල්පයක් මිස (එහි) පදිංචි නොවූහ. තවද (මේවාට) උරුමක්කාරයන් වූයේ අපිමය.

وَمَا كَانَ رَبُّكَ مُهْلِكَ الْقُرٰى حَتّٰى يَبْعَثَ فِىْٓ اُمِّهَا رَسُوْلًا يَّتْلُوْا عَلَيْهِمْ اٰيٰتِنَا ۚ وَمَا كُنَّا مُهْلِكِى الْقُرٰٓى اِلَّا وَاَهْلُهَا ظٰلِمُوْنَ ﴿٥٩﴾

60. තවද අපගේ සළකුණු ඔවුන්හට කියාපෙන්වන දූතයෙකුව එහි මව් නගරයට එවන තුරු ඔබගේ අධිපතියාණන් කිසිවිටෙකත් නගරයන් විනාශ නොකරන්නේය. එමෙන්ම එහි ජනයා අදමිටුවන් වීමෙන් මිස අපි නගරයන් විනාශ නොකරන්නෙමු.

وَمَآ اُوْتِيْتُمْ مِّنْ شَىْءٍ فَمَتَاعُ الْحَيٰوةِ الدُّنْيَا وَزِيْنَتُهَا ۚ وَمَا عِنْدَ اللّٰهِ خَيْرٌ وَّاَبْقٰى ۗ اَفَلَا تَعْقِلُوْنَ ﴿٦٠﴾

61. කවර දෙයක් නුඹලාට දෙන ලද්දේද එය මෙලෝ ජීවිතයෙහි තාවකාලික භුක්ති විඳීමක් මෙන්ම එහි අලංකාරය පමණි. නමුත් අල්ලාහ් වෙත ඇති දේ වඩා හොඳ මෙන්ම සදාකාලිකද වේ. එසේනම් නුඹලා තේරුම් නොගන්නෙහුද?

اَفَمَنْ وَّعَدْنٰهُ وَعْدًا حَسَنًا فَهُوَ لَاقِيْهِ كَمَنْ مَّتَّعْنٰهُ مَتَاعَ الْحَيٰوةِ الدُّنْيَا ثُمَّ هُوَ يَوْمَ الْقِيٰمَةِ مِنَ الْمُحْضَرِيْنَ ﴿٦١﴾

62. එසේනම්, අප යහපත් පොරොන්දුවක් පොරොන්දු වී එහි (ඉටුවීම) ලබන්නාත්, අප මෙලොව ජීවිතයෙහි තාවකාලික දේවල් ලබා දීමෙන් පසුව පුනරුත්ථාන දිනයේදී (දෙවියන් ඉදිරියෙහි නින්දිතව) ගෙන එනු ලබන්නාත් එක සමාන වේද?

وَيَوْمَ يُنَادِيْهِمْ فَيَقُوْلُ اَيْنَ شُرَكَآءِىَ

63. තවද එදින ඔහු ඔවුන්ව කැඳවා, 'නුඹලා සිතා සිටි මාහට (සමාන තැබූ) හවුල්කරුවන් කොහේද?'යි අසනු

الَّذِينَ كُنتُمْ تَزْعُمُونَ ٦٣

ඇත.

قَالَ الَّذِينَ حَقَّ عَلَيْهِمُ الْقَوْلُ رَبَّنَا هَٰؤُلَاءِ الَّذِينَ أَغْوَيْنَا أَغْوَيْنَاهُمْ كَمَا غَوَيْنَا ۖ تَبَرَّأْنَا إِلَيْكَ ۖ مَا كَانُوا إِيَّانَا يَعْبُدُونَ ٦٤

64. තමන්ට එරෙහිව තීන්දු ලැබුවාවූ අය (මෙසේ) කියනු ඇත. 'අපගේ අධිපතියාණෙනි! මොවුන්ව අපි නොමගට යොමු කළෙමු. අප නොමග ගිය පරිදිම අපි ඔවුන්වද නොමග යැව්වෙමු. (දැන්) අපි ඔබ වෙතට (හැරී ඔවුන්ගෙන්) වෙන් වන්නෙමු. ඔවුන් නමස්කාරය කළේ අප හට නොවේ'.

وَقِيلَ ادْعُوا شُرَكَاءَكُمْ فَدَعَوْهُمْ فَلَمْ يَسْتَجِيبُوا لَهُمْ وَرَأَوُا الْعَذَابَ ۚ لَوْ أَنَّهُمْ كَانُوا يَهْتَدُونَ ٦٥

65. තවද 'නුඹලාගේ (සමාන තැබූ) හවුල්කරුවන්ව අඬගසනු'යි ඔවුනට කියනු ලැබේ. එවිට ඔවුහු ඔවුන්ව අඬගසන්නෝය. නමුත් ඔවුහු ඔවුන්ට පිළිතුරු නොදෙනු ඇත. තවද ඔවුන් දඬුවම දකිනු ඇත. ඔවුන් මගපෙන්වීම අනුගමනය කළානම්!

وَيَوْمَ يُنَادِيهِمْ فَيَقُولُ مَاذَا أَجَبْتُمُ الْمُرْسَلِينَ ٦٦

66. තවද එදින ඔහු ඔවුන්ව අඬගසා (මෙසේ) කියනු ඇත. 'නුඹලා දූතයින්ට කුමන පිළිතුර දුන්නෙහුද?'

فَعَمِيَتْ عَلَيْهِمُ الْأَنبَاءُ يَوْمَئِذٍ فَهُمْ لَا يَتَسَاءَلُونَ ٦٧

67. පසුව එදින සියළු කාර්ය්‍යයන් ඔවුනට අපැහැදිලි වනු ඇත. තවද ඔවුන් එකිනෙකාගෙන් විමසන්නේ(ද) නැත.

فَأَمَّا مَن تَابَ وَآمَنَ وَعَمِلَ صَالِحًا فَعَسَىٰ أَن يَكُونَ مِنَ الْمُفْلِحِينَ ٦٨

68. නමුත් කවුරුන් හෝ පසුතැවිලි වී විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන්නේද ඔහු ජයග්‍රාහිකයන් අතර වන්නට පුළුවන.

وَرَبُّكَ يَخْلُقُ مَا يَشَاءُ وَيَخْتَارُ ۗ مَا كَانَ لَهُمُ الْخِيَرَةُ ۚ سُبْحَانَ اللَّهِ وَتَعَالَىٰ عَمَّا يُشْرِكُونَ ٦٩

69. තවද ඔබගේ අධිපතියාණන්, ඔහු කැමති දේ මවන්නේය. තවද (ඔහු අභිමත කෙනෙකුව) තෝරාගන්නේය. තෝරාගැනීම ඔවුන්ට (අදාල) නොවේ. අල්ලාහ් පාරිශුද්ධය. තවද ඔවුන් (ඔහුට) සමාන තබන සියල්ලට වඩා ඔහු අති උසස්ය.

وَرَبُّكَ يَعْلَمُ مَا تُكِنُّ صُدُورُهُمْ وَمَا يُعْلِنُونَ ٧٠

70. තවද ඔබගේ අධිපතියාණන් ඔවුන්ගේ සිත් සඟවන දේද ඔවුන් එළි කරන දේද දන්නේය.

وَهُوَ اللّٰهُ لَاۤ اِلٰهَ اِلَّا هُوَ ؕ لَهُ الْحَمْدُ فِى الْاُوْلٰى وَالْاٰخِرَةِ ۫ وَلَهُ الْحُكْمُ وَاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٧١﴾

71. තවද ඔහුම අල්ලාහ්ය. ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නැත. ආරම්භයේදීද පරලොවෙදීද සියළු ප්‍රසංශා ඔහුටම හිමිය. තවද විනිශ්චය ඔහුගේමය. තවද නුඹලා ආපසු ගෙන එනු ලබන්නේද ඔහු වෙතටමය.

قُلْ اَرَءَيْتُمْ اِنْ جَعَلَ اللّٰهُ عَلَيْكُمُ الَّيْلَ سَرْمَدًا اِلٰى يَوْمِ الْقِيٰمَةِ مَنْ اِلٰهٌ غَيْرُ اللّٰهِ يَاْتِيْكُمْ بِضِيَآءٍ ؕ اَفَلَا تَسْمَعُوْنَ ﴿٧٢﴾

72. පවසන්න. 'පුනරුත්ථාන දිනය තෙක් අල්ලාහ් නුඹලාට රාත්‍රිය නොකඩවා පවත්වා ගෙන ගියේ නම්, නුඹලාට ආලෝකය ගෙන ඒමට අල්ලාහ් හැර කවර දෙවියෙකු සිටින්නේද? එසේ නම් නුඹලා සවන් නොදෙන්නෙහුද?'යි මාහට පවසනු'

قُلْ اَرَءَيْتُمْ اِنْ جَعَلَ اللّٰهُ عَلَيْكُمُ النَّهَارَ سَرْمَدًا اِلٰى يَوْمِ الْقِيٰمَةِ مَنْ اِلٰهٌ غَيْرُ اللّٰهِ يَاْتِيْكُمْ بِلَيْلٍ تَسْكُنُوْنَ فِيْهِ ؕ اَفَلَا تُبْصِرُوْنَ ﴿٧٣﴾

73. පවසන්න. 'පුනරුත්ථාන දිනය දක්වා අල්ලාහ් නුඹලාට දහවල නොකඩවා පවත්වා ගෙන ගියේ නම්, නුඹලාට රාත්‍රිය එහි නුඹලා විවේක ගනු පිණිස ගෙන ඒමට අල්ලාහ් හැර කවර දෙවියෙකු සිටින්නේද? එසේ නම් නුඹලා (සිතා) නොබලන්නෙහුද?'යි මාහට පවසනු'

وَمِنْ رَّحْمَتِهٖ جَعَلَ لَكُمُ الَّيْلَ وَالنَّهَارَ لِتَسْكُنُوْا فِيْهِ وَلِتَبْتَغُوْا مِنْ فَضْلِهٖ وَلَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿٧٤﴾

74. තවද ඔහු ඔහුගේ දයාවෙන් නුඹලාට රාත්‍රිය සහ දවාල, නුඹලා එහි විවේක ගනු පිණිසද, එමෙන්ම ඔහුගේ වරප්‍රසාදය සොයනු පිණිසද, එමෙන්ම නුඹලා කෘතඥ වනු පිණිසද ඇති කළේය.

وَيَوْمَ يُنَادِيْهِمْ فَيَقُوْلُ اَيْنَ شُرَكَآءِىَ الَّذِيْنَ كُنْتُمْ تَزْعُمُوْنَ ﴿٧٥﴾

75. තවද එදින ඔහු ඔවුන්ව කැඳවා, 'නුඹලා සිතා සිටි මාහට (සමාන තැබූ) හවුල්කරුවන් කොහේද?'යි අසනු ඇත.

وَنَزَعْنَا مِنْ كُلِّ اُمَّةٍ شَهِيْدًا فَقُلْنَا هَاتُوْا بُرْهَانَكُمْ فَعَلِمُوْۤا اَنَّ الْحَقَّ لِلّٰهِ وَضَلَّ عَنْهُمْ مَّا كَانُوْا يَفْتَرُوْنَ ﴿٧٦﴾ ع

76. තවද අපි සෑම ජනතාවගෙන්ම සාක්ෂිකරුවෙකු ගෙන එන්නෙමු. තවද අපි, 'නුඹලාගේ සාධකය ගෙන එනු'යි කියන්නෙමු. පසුව සත්‍යය අල්ලාහ්ටම අයත් යැයි ඔවුහු දැන ගන්නෝය. තවද ඔවුන් ගොතමින් සිටි දේ ඔවුන්ගෙන් ගිලිහී යනු ඇත.

إِنَّ قَارُونَ كَانَ مِن قَوْمِ مُوسَىٰ فَبَغَىٰ عَلَيْهِمْ ۖ وَآتَيْنَاهُ مِنَ الْكُنُوزِ مَا إِنَّ مَفَاتِحَهُ لَتَنُوأُ بِالْعُصْبَةِ أُولِي الْقُوَّةِ ۚ إِذْ قَالَ لَهُ قَوْمُهُ لَا تَفْرَحْ ۖ إِنَّ اللَّهَ لَا يُحِبُّ الْفَرِحِينَ ﴿٧٧﴾

77. සැබැවින්ම කාරූන් මූසාගේ ජනතාවගෙන් විය. නමුත් ඔහු ඔවුන් කෙරෙහි කෲර ලෙස හැසිරුණේය. තවද අපි ඔහුට නිධානයන් ලබා දුන්නෙමු. ඒවායෙහි යතුරු ශක්තිමත් මිනිස් පිරිසකට පවා ඉසිලිය නොහැකි වන්නක් විය. එවිට ඔහුගේ ජනතාව ඔහු වෙත, 'උදම් නොවන්න, නියතවශයෙන්ම අල්ලාහ් උදම් වන්නන්ව ප්‍රිය නොකරන්නේයැ'යි කීහ.

وَابْتَغِ فِيمَا آتَاكَ اللَّهُ الدَّارَ الْآخِرَةَ وَلَا تَنسَ نَصِيبَكَ مِنَ الدُّنْيَا وَأَحْسِن كَمَا أَحْسَنَ اللَّهُ إِلَيْكَ وَلَا تَبْغِ الْفَسَادَ فِي الْأَرْضِ ۖ إِنَّ اللَّهَ لَا يُحِبُّ الْمُفْسِدِينَ ﴿٧٨﴾

78. 'තවද අල්ලාහ් නුඹට දී ඇති දෙයින් පරලොවේ නිවස සොයනු. තවද මෙලොවෙහි නුඹගේ කොටස පැහැර නොහරිනු. තවද අල්ලාහ් නුඹට යහපත කළා මෙන් නුඹද (අනුන්ට) යහපත කරනු. තවද පොළොවෙහි කලබල ඇති කිරීමට තැත් නොකරනු. සැබැවින්ම අල්ලාහ් කලබල ඇතිකරන්නන්ව ප්‍රිය නොකරයි'.

قَالَ إِنَّمَا أُوتِيتُهُ عَلَىٰ عِلْمٍ عِندِي ۚ أَوَلَمْ يَعْلَمْ أَنَّ اللَّهَ قَدْ أَهْلَكَ مِن قَبْلِهِ مِنَ الْقُرُونِ مَنْ هُوَ أَشَدُّ مِنْهُ قُوَّةً وَأَكْثَرُ جَمْعًا ۚ وَلَا يُسْأَلُ عَن ذُنُوبِهِمُ الْمُجْرِمُونَ ﴿٧٩﴾

79. ඔහු, 'මා හට මෙය දෙනු ලැබුවේ මා සතු දැනුම හේතුකොට ගෙන යැ'යි කීවේය. ඔහුට වඩා බලවත් වූද ධනයෙන් වඩා අධික වූද පරම්පරාවන් කොපමණක් ඔහුට පෙර අල්ලාහ් විනාශ කළේදැයි ඔහු නොදන්නේද? තවද වරදකරුවන්ගෙන් ඔවුන්ගේ පව්වලට (කරුණු දැක්වීමක්) විමසනු නොලබන්නේය.

فَخَرَجَ عَلَىٰ قَوْمِهِ فِي زِينَتِهِ ۖ قَالَ الَّذِينَ يُرِيدُونَ الْحَيَاةَ الدُّنْيَا يَا لَيْتَ لَنَا مِثْلَ مَا أُوتِيَ قَارُونُ إِنَّهُ لَذُو حَظٍّ عَظِيمٍ ﴿٨٠﴾

80. එබැවින් ඔහු උත්කර්ෂවත් අන්දමින් තම ජනතාව ඉදිරියට ගියේය. මෙලෝ ජීවිතය ප්‍රිය කළ අය (මෙසේ) කීහ. 'කාරූන්ට දෙන ලද දේ මෙන් අපටත් තිබුණා නම්! ඇත්තෙන්ම ඔහු මහත් භාග්‍යවන්තයෙක්ය'.

وَقَالَ الَّذِينَ أُوتُوا الْعِلْمَ وَيْلَكُمْ

81. නමුත් දැනුම දෙනු ලැබූ අය, 'නුඹලාට විනාශයයි. විශ්වාස කොට

ثَوَابُ اللّٰهِ خَيْرٌ لِّمَنْ اٰمَنَ وَعَمِلَ صَالِحًا ۚ وَلَا يُلَقّٰهَآ اِلَّا الصّٰبِرُوْنَ ﴿٨١﴾

යහපත් ක්‍රියා කරන්නන් හට අල්ලාහ්ගේ තිළිණය අති ශ්‍රේෂ්ඨය. තවද, ඉවසිලිවන්තයින්ට හැර අන් කිසිවෙකුටත් එය පිරිනමනු නොලැබේ යැ'යි කීහ.

فَخَسَفْنَا بِهٖ وَبِدَارِهِ الْاَرْضَ ۗ فَمَا كَانَ لَهٗ مِنْ فِئَةٍ يَّنْصُرُوْنَهٗ مِنْ دُوْنِ اللّٰهِ ۚ وَمَا كَانَ مِنَ الْمُنْتَصِرِيْنَ ﴿٨٢﴾

82. පසුව අපි ඔහුවද, ඔහුගේ වාසස්ථානයද, පොළොව ගිල ගැනීමට සැලැස්වූයෙමු. තවද, අල්ලාහ්ට එරෙහිව උදව් කිරීමට කිසිදු පිරිසක් ඔහුට නොවීය. එමෙන්ම ඔහු අල්ලාහ්ගේ නියමය අභිබවා යා හැකි වන්නන්ගෙන්ද කෙනෙක් නොවීය.

وَاَصْبَحَ الَّذِيْنَ تَمَنَّوْا مَكَانَهٗ بِالْاَمْسِ يَقُوْلُوْنَ وَيْكَاَنَّ اللّٰهَ يَبْسُطُ الرِّزْقَ لِمَنْ يَّشَآءُ مِنْ عِبَادِهٖ وَيَقْدِرُ ۚ لَوْلَآ اَنْ مَّنَّ اللّٰهُ عَلَيْنَا لَخَسَفَ بِنَا ۗ وَيْكَاَنَّهٗ لَا يُفْلِحُ الْكٰفِرُوْنَ ﴿٨٣﴾

83. තවද, පෙර දින තෙක් ඔහුගේ තත්ත්වයට ගිජුකම දැක්වූ අය (මෙසේ) කියන්නට පටන් ගත්හ. 'අහෝ! ඇත්තෙන්ම අල්ලාහ්, ඔහුගේ දාසයින්ට ඔහු අභිමතවූ පරිදි ජීවනෝපාය වැඩි කර දෙන්නේය. තවද, (ඔහු අභිමත අයට) අඩු කර දෙන්නේය. අල්ලාහ් අපට කාරුණික නොවූයේ නම්, එය අපව(ද) ගිල දැමීමට ඔහුට සලස්වන්නට තිබුණි. අහෝ! අවිශ්වාසිතයින් කිසිවිටෙකත් ජය නොලබන්නෝය'.

تِلْكَ الدَّارُ الْاٰخِرَةُ نَجْعَلُهَا لِلَّذِيْنَ لَا يُرِيْدُوْنَ عُلُوًّا فِى الْاَرْضِ وَلَا فَسَادًا ۗ وَالْعَاقِبَةُ لِلْمُتَّقِيْنَ ﴿٨٤﴾

84. පරලොවේ නිවස මෙයමයි! පොළොවෙහි උද්දච්චකමට සහ කලහකාරිත්වයට කැමති නොවන අයහට අපි එය ලබා දෙන්නෙමු. තවද, (යහපත්) අවසානය බියබැතිමතුන් හට වේ.

مَنْ جَآءَ بِالْحَسَنَةِ فَلَهٗ خَيْرٌ مِّنْهَا ۚ وَمَنْ جَآءَ بِالسَّيِّئَةِ فَلَا يُجْزَى الَّذِيْنَ عَمِلُوا السَّيِّاٰتِ اِلَّا مَا كَانُوْا يَعْمَلُوْنَ ﴿٨٥﴾

85. යමෙක් යහපත් ක්‍රියාවක් කරන්නේද, ඔහු ඊටත් වඩා හොඳ තිළිණයක් ලබන්නේය. තවද, යමෙක් නපුරු ක්‍රියාවක් කරන්නේද, (එවන් අයව ගත්කල) ඔවුන් කළ දේට අනුව මිස ඔවුන්ට තිළිණ දෙනු නොලබන්නේය.

اِنَّ الَّذِىْ فَرَضَ عَلَيْكَ الْقُرْاٰنَ لَرَآدُّكَ اِلٰى مَعَادٍ ۗ قُلْ رَّبِّىْٓ اَعْلَمُ مَنْ جَآءَ

86. නියතවශයෙන්ම කුර්ආනයෙහි (ඉගැන්වීම්) ඔබට අනිවාර්ය කළ ඔහු (ඔබගේ) ආපසු පැමිණෙන ස්ථානයට ඔබව නැවත ගෙන එන්නේය.

بِالْهُدٰى وَمَنْ هُوَ فِىْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٨٦﴾

පවසන්න. 'මාගේ අධිපතියාණන් මගපෙන්වීම ගෙන එන්නේ කවුරුන්ද යන්නත් ප්‍රත්‍යක්ෂ වරදෙහි ඇත්තේ කවුරුන්ද යන්නත් මැනැවින් දන්නේය'.

وَمَا كُنْتَ تَرْجُوْٓا اَنْ يُّلْقٰٓى اِلَيْكَ الْكِتٰبُ اِلَّا رَحْمَةً مِّنْ رَّبِّكَ فَلَا تَكُوْنَنَّ ظَهِيْرًا لِّلْكٰفِرِيْنَ ﴿٨٧﴾

87. තවද ඔබ වෙත ග්‍රන්ථය අනාවරණය කරනු ලබන්නේයැයි ඔබ කිසිවිටෙකත් අපේක්ෂා නොවූයෙහිය. නමුත් මෙය ඔබගේ අධිපතියාණන්ගෙන් වන දයාවක් වේ. එබැවින් ඔබ කිසිවිටෙකත් අවිශ්වාසීතයින් හට උදව්කරුවෙකු නොවන්න.

وَلَا يَصُدُّنَّكَ عَنْ اٰيٰتِ اللّٰهِ بَعْدَ اِذْ اُنْزِلَتْ اِلَيْكَ وَادْعُ اِلٰى رَبِّكَ وَلَا تَكُوْنَنَّ مِنَ الْمُشْرِكِيْنَ ﴿٨٨﴾

88. තවද අල්ලාහ්ගේ වදන් වලින් ඒවා ඔබ වෙත එවන ලද පසුව ඔබව ඉවත හරවන්නට ඔවුන්ට ඉඩ නොදෙත්වා. තවද (මිනිස් සංහතිය) ඔබ අධිපතියාණන් වෙතට කැඳවන්න. තවද සමාන තබන්නන්ගෙන් නොවන්න.

وَلَا تَدْعُ مَعَ اللّٰهِ اِلٰهًا اٰخَرَ ۘ لَآ اِلٰهَ اِلَّا هُوَ ۟ كُلُّ شَيْءٍ هَالِكٌ اِلَّا وَجْهَهٗ ؕ لَهُ الْحُكْمُ وَاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٨٩﴾

89. තවද අල්ලාහ් හැර වෙනත් දෙවියෙකුව නොකැඳවන්න. ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙකු නැත. ඔහු හැර අන් සියළු දේ විනාශ වනු ඇත. විනිශ්චය ඔහුටමය. තවද නුඹලාව ආපසු ගෙන එනු ලබන්නේ ඔහු වෙතටමය.



අල් අන්කබූත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓ ۝٢

2. අලිෆ්, ලාම්, මීම්. ◆

اَحَسِبَ النَّاسُ اَنۡ يُّتۡرَكُوۡۤا اَنۡ يَّقُوۡلُوۡۤا اٰمَنَّا وَهُمۡ لَا يُفۡتَنُوۡنَ ۝٣

3. 'අපි විශ්වාස කළෙමු'යි තමන් පවසන නිසා තමන් අත්හරිනු ලබා තමන් පිරික්සුමට ලක් නොකරනු ඇතැයි මිනිසුන් සිතන්නෝද?

وَلَقَدۡ فَتَنَّا الَّذِيۡنَ مِنۡ قَبۡلِهِمۡ فَلَيَعۡلَمَنَّ اللّٰهُ الَّذِيۡنَ صَدَقُوۡا وَلَيَعۡلَمَنَّ الۡكٰذِبِيۡنَ ۝٤

4. තවද ඔවුන්ට පෙර සිටි අයව අපි පිරික්සුමට ලක් කළෙමු. එමනිසා අල්ලාහ් නියතවශයෙන්ම සත්‍යවාදීන් කවුරුන්දැයි වෙන් කොට හඳුනාගන්නේය. එමෙන්ම ඔහු නියතවශයෙන්ම මුසාවාදීන්වද වෙන්කොට හඳුනාගන්නේය.

اَمۡ حَسِبَ الَّذِيۡنَ يَعۡمَلُوۡنَ السَّيِّاٰتِ اَنۡ يَّسۡبِقُوۡنَا ؕ سَآءَ مَا يَحۡكُمُوۡنَ ۝٥

5. නැතහොත් නරක ක්‍රියාවන්හි යෙදෙන්නන් අපගෙන් බේරා යන්නේ යැයි සිතන්නෝද? ඔවුන් තීරණය කරන දේ නපුරුය.

مَنۡ كَانَ يَرۡجُوۡا لِقَآءَ اللّٰهِ فَاِنَّ اَجَلَ اللّٰهِ لَاٰتٍ ؕ وَهُوَ السَّمِيۡعُ الۡعَلِيۡمُ ۝٦

6. කවුරුන් හෝ අල්ලාහ්ව හමුවීමට බලාපොරොත්තු වන්නේද, (ඔහු එයට සූදානම් විය යුතුය) මන්ද අල්ලාහ් නියම කළ වේලාව නියතවශයෙන්ම පැමිණෙනු ඇත. තවද ඔහු සියල්ල අසන්නාය. සියල්ල දත්තාය.

وَمَنۡ جَاهَدَ فَاِنَّمَا يُجَاهِدُ لِنَفۡسِهٖ ؕ اِنَّ اللّٰهَ لَغَنِىٌّ عَنِ الۡعٰلَمِيۡنَ ۝٧

7. තවද කවරෙකු හෝ පරිශ්‍රමයෙහි යෙදෙන්නේද, ඔහු තමාගේම ආත්මය වෙනුවෙන් පරිශ්‍රමයෙහි යෙදෙන්නේය. සැබැවින්ම අල්ලාහ් මුළු විශ්වයෙන්ම ස්වයංපෝෂිතය.

وَالَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ

8. තවද විශ්වාස කර යහපත් ක්‍රියා

◆ මම අල්ලාහ් සියල්ල දත්තා වෙමි.

لَنُكَفِّرَنَّ عَنْهُمْ سَيِّاٰتِهِمْ وَلَنَجْزِيَنَّهُمْ اَحْسَنَ الَّذِىْ كَانُوْا يَعْمَلُوْنَ ۝٨

කරන්නන් ගත්කල අපි නියතවශයෙන්ම ඔවුන්ගෙන් ඔවුන්ගේ නපුර ඉවත් කරන්නෙමු. තවද අපි නියතවශයෙන්ම ඔවුන්හට ඔවුන්ගේ ක්‍රියාවන් සඳහා විශිෂ්ට තිළිණය දෙන්නෙමු.

وَوَصَّيْنَا الْاِنْسَانَ بِوَالِدَيْهِ حُسْنًا ؕ وَاِنْ جَاهَدٰكَ لِتُشْرِكَ بِىْ مَا لَيْسَ لَكَ بِهٖ عِلْمٌ فَلَا تُطِعْهُمَا ؕ اِلَىَّ مَرْجِعُكُمْ فَاُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ تَعْمَلُوْنَ ۝٩

9. තවද තම දෙමව්පියන්ට කරුණාව දැක්විය යුතුයැයි අපි මිනිසාට අණ කර ඇත්තෙමු. නමුත් ඔබට දැනුමක් නැති දේ පිළිබඳව මා හට සමාන තැබිය යුතුයැයි ඔවුන් දෙදෙනා ඔබ සමග තර්ක කරන්නේ නම් එවිට ඔබ ඔවුන් දෙදෙනාට කීකරු නොවන්න. නුඹලාගේ ආපසු පැමිණීම මා වෙතටමය. පසුව නියතවශයෙන්ම නුඹලා කරමින් සිටි දේ ගැන මා නුඹලාට දන්වන්නෙමි.

وَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ لَنُدْخِلَنَّهُمْ فِى الصّٰلِحِيْنَ ۝١٠

10. තවද විශ්වාස කර යහපත් ක්‍රියාවන් කරන අය ගත්කල, අපි ඔවුන්ව නියතවශයෙන්ම ධාර්මිෂ්ඨකයින් අතරට ඇතුළු කරන්නෙමු.

وَمِنَ النَّاسِ مَنْ يَّقُوْلُ اٰمَنَّا بِاللّٰهِ فَاِذَاۤ اُوْذِىَ فِى اللّٰهِ جَعَلَ فِتْنَةَ النَّاسِ كَعَذَابِ اللّٰهِ ؕ وَلَئِنْ جَآءَ نَصْرٌ مِّنْ رَّبِّكَ لَيَقُوْلُنَّ اِنَّا كُنَّا مَعَكُمْ ؕ اَوَلَيْسَ اللّٰهُ بِاَعْلَمَ بِمَا فِىْ صُدُوْرِ الْعٰلَمِيْنَ ۝١١

11. තවද මිනිසුන් අතර (සමහරුන්) 'අපි අල්ලාහ් කෙරෙහි විශ්වාස කළෙමු'යි පවසති. නමුත් ඔවුන්ව අල්ලාහ්ගේ මාර්ගයෙහි දුක් විඳීමට සැලැස්වූ කල්හි ඔවුන් මිනිසුන්ගේ හිංසනය අල්ලාහ්ගේ දඬුවමක් ලෙස සළකති. තවද ඔබගේ අධිපතියාණන්ගෙන් උදව් පැමිණෙන විට 'අපි නිශ්චිතවම ඔබ සමග සිටියෙමු'යි ඔවුන් සත්තකින්ම කියති. සියලු ලෝ වැසියන්ගේ හදවත්හි ඇති දේ අල්ලාහ් මැනැවින් දන්නේ නොවේද?

وَلَيَعْلَمَنَّ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا وَلَيَعْلَمَنَّ الْمُنٰفِقِيْنَ ۝١٢

12. තවද අල්ලාහ් නියතවශයෙන්ම විශ්වාස කරන අයව වෙන් කොට හඳුනාගන්නේය. එමෙන්ම ඔහු නියතවශයෙන්ම කුහකයින්වද වෙන්කොට හඳුනාගන්නේය.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا لِلَّذِيْنَ اٰمَنُوا اتَّبِعُوْا

13. තවද අවිශ්වාසිත අය විශ්වාසිත

سَبِيْلَنَا وَلْنَحْمِلْ خَطٰيٰكُمْ ؕ وَمَا هُمْ بِحٰمِلِيْنَ مِنْ خَطٰيٰهُمْ مِّنْ شَيْءٍ ؕ اِنَّهُمْ لَكٰذِبُوْنَ ﴿١٣﴾

අයට 'අපගේ මාර්ගය අනුගමනය කරනු. තවද අපි නියතවශයෙන්ම නුඹලාගේ පව් උසුලන්නෙමු'යි කියති. එහෙත් ඔවුන්හට මොවුන්ගේ පව්වලින් කිසිවක් ඉසිලිය නොහැක. නියතවශයෙන්ම ඔවුන් මුසාවාදීන්ය.

وَلَيَحْمِلُنَّ اَثْقَالَهُمْ وَاَثْقَالًا مَّعَ اَثْقَالِهِمْ ۫ وَلَيُسْـَٔلُنَّ يَوْمَ الْقِيٰمَةِ عَمَّا كَانُوْا يَفْتَرُوْنَ ﴿١٤﴾ ع

14. නමුත් ඔවුන් නියතවශයෙන්ම ඔවුන්ගේ බර උසුලන්නෝය. එසේම ඔවුන්ගේ බර සමග අමතර (අයගේ) බරද (උසුලන්නෝය). තවද පුනරුත්ථාන දිනයේදී ඔවුන් ගෙතූ දේ පිළිබඳව ඔවුන් ප්‍රශ්ණ කරනු ලබන්නෝය.

وَلَقَدْ اَرْسَلْنَا نُوْحًا اِلٰى قَوْمِهٖ فَلَبِثَ فِيْهِمْ اَلْفَ سَنَةٍ اِلَّا خَمْسِيْنَ عَامًا ؕ فَاَخَذَهُمُ الطُّوْفَانُ وَهُمْ ظٰلِمُوْنَ ﴿١٥﴾

*15. තවද අපි නියතවශයෙන්ම නූහ්ව ඔහුගේ ජනතාව වෙතට යැව්වෙමු. තවද ඔහු ඔවුනතර අවුරුදු දහසකට පනහක් අඩුවෙන් ජීවත් විය. පසුව ඔවුන් වරදකරුවන්ව සිටියදී මහා ජලගැල්මක් ඔවුන්ව හසුකර ගත්තේය.

فَاَنْجَيْنٰهُ وَاَصْحٰبَ السَّفِيْنَةِ وَجَعَلْنٰهَا اٰيَةً لِّلْعٰلَمِيْنَ ﴿١٦﴾

16. නමුත් අපි ඔහුව සහ (ඔහු සමග) නැවේ සිටි අයව මුදවා ගත්තෙමු. තවද අපි එය සියළු ලෝ වැසියන්ට සළකුණක් කළෙමු.

وَاِبْرٰهِيْمَ اِذْ قَالَ لِقَوْمِهِ اعْبُدُوا اللّٰهَ وَاتَّقُوْهُ ؕ ذٰلِكُمْ خَيْرٌ لَّكُمْ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ﴿١٧﴾

17. තවද ඉබ්රාහීම් ඔහුගේ ජනතාවට (මෙසේ) කියූ අවස්ථාව (සිහිපත් කරනු). 'අල්ලාහ්ට නමදිනු. තවද ඔහුටම බියබැතිමත් වනු. නුඹලා දන්නේ නම්, එය නුඹලාට ඉතා යහපත්ය'.

اِنَّمَا تَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ اَوْثَانًا وَّتَخْلُقُوْنَ اِفْكًا ؕ اِنَّ الَّذِيْنَ تَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ لَا يَمْلِكُوْنَ لَكُمْ رِزْقًا فَابْتَغُوْا

18. 'නුඹලා අල්ලාහ් හැර ප්‍රතිමාවන් පමණක් වඳින්නෙහුය. තවද නුඹලා බොරු ගොතන්නෙහුය. අල්ලාහ් හැර නුඹලා වඳින අය හට නුඹලා වෙනුවෙන් ජීවනෝපාය සපයන්නට කිසිදු බලයක් නැත. එමනිසා, අල්ලාහ්ගෙන් පමණක් ජීවනෝපාය

*සටහන. 15: මෙහි සඳහන් අවුරුදු 950 නූහ් නබි තුමාගේ ෂරීඅත් කාලසීමාවයි.

عِنۡدَ اللّٰهِ الرِّزۡقَ وَاعۡبُدُوۡهُ وَاشۡكُرُوۡا لَهٗ ؕ اِلَيۡهِ تُرۡجَعُوۡنَ ﴿۱۸﴾

පතනු. තවද ඔහුටම නමදිනු තවද. ඔහුට කෘතඥද වනු. නුඹලා ආපසු ගෙන එනු ලබන්නේද ඔහු වෙතටමය'.

وَاِنۡ تُكَذِّبُوۡا فَقَدۡ كَذَّبَ اُمَمٌ مِّنۡ قَبۡلِكُمۡ ؕ وَمَا عَلَى الرَّسُوۡلِ اِلَّا الۡبَلٰغُ الۡمُبِيۡنُ ﴿۱۹﴾

19. 'තවද නුඹලා ප්‍රතික්ෂේප කරන්නේ නම්, නුඹලාට පෙර සිටි පරම්පරාද ප්‍රතික්ෂේප කළහ. තවද, දූතයාණන්හට වගකීම වන්නේ, (පණිවිඩය) පැහැදිලිව පමුණුවීම පමණි'.

اَوَلَمۡ يَرَوۡا كَيۡفَ يُبۡدِئُ اللّٰهُ الۡخَلۡقَ ثُمَّ يُعِيۡدُهٗ ؕ اِنَّ ذٰ لِكَ عَلَى اللّٰهِ يَسِيۡرٌ ﴿۲۰﴾

20. අල්ලාහ් මැවීම ආරම්භ කරන සැටිත් එය නැවතත් කරන සැටිත් ඔවුන් නොදකින්නේද? එය අල්ලාහ්ට නියතවශයෙන්ම ඉතා පහසුය.

قُلۡ سِيۡرُوۡا فِى الۡاَرۡضِ فَانْظُرُوۡا كَيۡفَ بَدَاَ الۡخَلۡقَ ثُمَّ اللّٰهُ يُنۡشِئُ النَّشۡاَةَ الۡاٰخِرَةَ ؕ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَىۡءٍ قَدِيۡرٌ ۚ ﴿۲۱﴾

*21. පවසන්න, 'අල්ලාහ් මැවීම ආරම්භ කරන්නේ කෙසේදැයි නුඹලා පොළොවෙහි සැරිසරා බලනු. පසුව අල්ලාහ් තවත් මැවීමක් ඇති කරන්නේය'. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දේ කෙරෙහි බලසම්පන්නය.

يُعَذِّبُ مَنۡ يَّشَآءُ وَيَرۡحَمُ مَنۡ يَّشَآءُ ۚ وَاِلَيۡهِ تُقۡلَبُوۡنَ ﴿۲۲﴾

22. ඔහු තමා අභිමත අයට දඬුවම් දෙන්නේය. තවද තමා අභිමත අයට කරුණාව දක්වන්නේය. තවද නුඹලා ආපසු පමුණුවනු ලබන්නේද ඔහු වෙතටමය.

وَمَاۤ اَنۡتُمۡ بِمُعۡجِزِيۡنَ فِى الۡاَرۡضِ وَلَا فِى السَّمَآءِ ۖ وَمَا لَـكُمۡ مِّنۡ دُوۡنِ اللّٰهِ مِنۡ وَّلِىٍّ وَّلَا نَصِيۡرٍ ﴿۲۳﴾

23. අහස්හිද පොළොවෙහිද (අල්ලාහ්ගේ සැලසුම්) නුඹලාට නිෂ්ඵල කළ නොහැකිය. තවද නුඹලාට අල්ලාහ් හැර කිසිදු මිත්‍රයෙකු හෝ උදව්කරුවෙකු නැත.

وَالَّذِيۡنَ كَفَرُوۡا بِاٰيٰتِ اللّٰهِ وَلِقَآئِهٖۤ

24. අල්ලාහ්ගේ සළකුණු කෙරෙහි

*සටහන. 21: මෙහි වන සිද්ධාන්තයට සමාන එකක් තවත් වාක්‍යයක (53:48) සුළු වචනයක් වෙනසක් සමග සටහන් වී ඇත. 'ආහිරා' යන වචනය වෙනුවට 'උහ්රා' යන වචනය භාවිතා කර ඇත. ආහිරා යන්නෙහි පරිවර්තනය සරලව 'පසුව' වේ. නමුත් උහ්රා යන්නෙහි තේරුම 'තවත්' වේ. එබැවින් 'උහ්රා' සහ 'ආහිරා' යන වචන දෙක සම්බන්ධ කළ විට 'තවත් වර්ගයේ මැවීමක් පසු කාලයක' යන අරුත ගෙන දෙයි.

أُولَٰٓئِكَ يَئِسُوا مِن رَّحْمَتِي وَأُولَٰٓئِكَ لَهُمْ عَذَابٌ أَلِيمٌ ٢٤

සහ ඔහු හමුවීම කෙරෙහි අවිශ්වාස කරන අය ගත්කල, මාගේ දයාවෙහි බලාපොරොත්තු සුන් කර ගත් අය ඔවුන්මය. එමෙන්ම වේදනීය දඬුවම ඇත්තේද ඔවුන්ටමය.

فَمَا كَانَ جَوَابَ قَوْمِهِۦٓ إِلَّآ أَن قَالُوا اقْتُلُوهُ أَوْ حَرِّقُوهُ فَأَنجَىٰهُ اللَّهُ مِنَ النَّارِ ۚ إِنَّ فِي ذَٰلِكَ لَأَيَٰتٍ لِّقَوْمٍ يُؤْمِنُونَ ٢٥

25. තවද ඔහුගේ ජනතාවගේ පිළිතුර වූයේ, 'ඔහුව ඝාතනය කරනු, නැතහොත් ඔහුව පුළුස්සා දමනු'යි කිවා මිස නැත. නමුත් අල්ලාහ් ඔහුව ගින්නෙන් මුදවා ගත්තේය. නියතවශයෙන්ම එහි විශ්වාස කරන ජනතාවට සළකුණු ඇත.

وَقَالَ إِنَّمَا اتَّخَذْتُم مِّن دُونِ اللَّهِ أَوْثَٰنًا مَّوَدَّةَ بَيْنِكُمْ فِي الْحَيَوٰةِ الدُّنْيَا ۖ ثُمَّ يَوْمَ الْقِيَٰمَةِ يَكْفُرُ بَعْضُكُم بِبَعْضٍ وَيَلْعَنُ بَعْضُكُم بَعْضًا وَمَأْوَىٰكُمُ النَّارُ وَمَا لَكُم مِّن نَّٰصِرِينَ ٢٦

26. තවද ඔහු, 'මෙලොව ජීවිතයෙහි එකිනෙකාට ඇති ස්නේහය නිසා නුඹලා අල්ලාහ්ව හැර ප්‍රතිමාවන් (ඇදහිමට) ගත්තෙහුය. පසුව පුනරුත්ථාන දිනයේදී නුඹලා එකිනෙකාව ප්‍රතික්ෂේප කරන්නෙහුය. තවද එකිනෙකාට ශාප කරන්නෙහුය. තවද නුඹලාගේ වාසස්ථානය ගින්න වනු ඇත. තවද නුඹලාට උදව්කරුවන්ද නොවනු ඇතැ'යි පැවසුවේය.

فَـَٔامَنَ لَهُۥ لُوطٌ ۘ وَقَالَ إِنِّي مُهَاجِرٌ إِلَىٰ رَبِّيٓ ۖ إِنَّهُۥ هُوَ الْعَزِيزُ الْحَكِيمُ ٢٧

27. තවද ලූත් ඔහුව(ඉබ්රාහිම්ව) විශ්වාස කළේය. තවද (ඉබ්රාහිම්) 'මම මාගේ අධිපතියාණන් වෙත සරණ පැතීමට සංක්‍රමණය කරන්නෙමි. නියත වශයෙන්ම ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නයැ'යි පැවසුවේය.

وَوَهَبْنَا لَهُۥٓ إِسْحَٰقَ وَيَعْقُوبَ وَجَعَلْنَا فِي ذُرِّيَّتِهِ النُّبُوَّةَ وَالْكِتَٰبَ وَءَاتَيْنَٰهُ أَجْرَهُۥ فِي الدُّنْيَا ۖ وَإِنَّهُۥ فِي الْءَاخِرَةِ لَمِنَ الصَّٰلِحِينَ ٢٨

28. තවද අපි ඔහුට ඉස්හාක්ව සහ යඃකූබ්ව පිරිනැමුවෙමු. තවද අපි ඔහුගේ පැවත එන්නන් අතර වක්තෘ තත්ත්වය සහ පුස්තකය (යන ත්‍යාග) හිමි කළෙමු. තවද අපි ඔහුගේ තිළිණය මෙලොවෙහිදී ඔහුට දුන්නෙමු. තවද පරලොවෙහි ඔහු නියතවශයෙන්ම ධාර්මිෂ්ඨකයින් අතර වනු ඇත.

29. තවද (අපි) ලූත්ව (යැව්වෙමු). එවිට ඔහු තම ජනතාවට (මෙසේ) කිව්වේය. 'නුඹලාට පෙර, ලෝකයේ කිසිවෙකු කිසිවිටෙකත් නොකළ නින්දිත දෙයක් නුඹලා කරන්නෙහුය'

وَلُوطًا اِذْ قَالَ لِقَوْمِهٖۤ اِنَّكُمْ لَتَاْتُوْنَ الْفَاحِشَةَ ۫ مَا سَبَقَكُمْ بِهَا مِنْ اَحَدٍ مِّنَ الْعٰلَمِيْنَ ﴿٢٩﴾

30. 'නුඹලා ඇත්තෙන්ම පුරුෂයින් වෙත (කාමයෙන් යුතුව) පැමිණෙන්නෙහුද? තවද නුඹලා මං පැහැරීම් කරන්නෙහුය. තවද නුඹලා නුඹලාගේ රැස්වන ස්ථානවලදී පිළිකුල් දෙයෙහි නියැලෙන්නෙහුය.' නමුත් ඔහුගේ ජනතාවගේ පිළිතුර වූයේ, 'ඔබ සත්‍යය පවසන්නේ නම් අල්ලාහ්ගේ දඬුවම අප වෙත ගෙන එනු'යි කීවා මිස නැත.

اَئِنَّكُمْ لَتَاْتُوْنَ الرِّجَالَ وَتَقْطَعُوْنَ السَّبِيْلَ ۙ وَتَاْتُوْنَ فِيْ نَادِيْكُمُ الْمُنْكَرَ ؕ فَمَا كَانَ جَوَابَ قَوْمِهٖۤ اِلَّاۤ اَنْ قَالُوا ائْتِنَا بِعَذَابِ اللّٰهِ اِنْ كُنْتَ مِنَ الصّٰدِقِيْنَ ﴿٣٠﴾

31. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! කලහකාරී ජනතාවට එරෙහිව මට උදව් කරනු මැනවැ'යි කිව්වේය.

قَالَ رَبِّ انْصُرْنِيْ عَلَى الْقَوْمِ الْمُفْسِدِيْنَ ﴿٣١﴾ ع

32. තවද අපගේ දූතයින් ශුභාරංචි රැගෙන ඉබ්රාහිම් වෙතට පැමිණි කල්හි ඔවුහු, 'අපි ඇත්තෙන්ම මෙම නගරයේ ජනතාව විනාශ කරන්නට යන්නෙමු. නියතවශයෙන්ම මෙහි ජනතාව වරදකරුවන් වෙති'යි කීහ.

وَلَمَّا جَآءَتْ رُسُلُنَاۤ اِبْرٰهِيْمَ بِالْبُشْرٰى ۙ قَالُوْۤا اِنَّا مُهْلِكُوْۤا اَهْلِ هٰذِهِ الْقَرْيَةِ ۚ اِنَّ اَهْلَهَا كَانُوْا ظٰلِمِيْنَ ۚ﴿٣٢﴾

33. 'නමුත් ලූත් එහි සිටින්නේයැ'යි ඔහු කිව්වේය. 'එහි සිටින්නේ කවුරුන්දැ'යි අපි මැනැවින් දනිමු. අපි නියතවශයෙන්ම ඔහුගේ බිරිඳ හැර ඔහුවද ඔහුගේ පවුලේ අයවද මුදවා ගන්නෙමු. ඇය පසු බසින්නන්ගෙන් වූවායැ'යි ඔවුහු කීහ.

قَالَ اِنَّ فِيْهَا لُوْطًا ؕ قَالُوْا نَحْنُ اَعْلَمُ بِمَنْ فِيْهَا ۫ لَنُنَجِّيَنَّهٗ وَاَهْلَهٗۤ اِلَّا امْرَاَتَهٗ ۫ كَانَتْ مِنَ الْغٰبِرِيْنَ ﴿٣٣﴾

34. තවද අපගේ දූතයින් ලූත් වෙතට පැමිණි කල්හි, ඔහු ඔවුන් පිළිබඳව කනස්සල්ලට පත් විය. තවද ඔවුන් සම්බන්ධව කිසිවක් කරගන්නට හැකියාවක් නොමැති බව ඔහුට දැනුනි. තවද ඔවුහු, 'බිය නොවන්න, තවද ශෝක නොවන්න.

وَلَمَّاۤ اَنْ جَآءَتْ رُسُلُنَا لُوْطًا سِيْٓءَ بِهِمْ وَضَاقَ بِهِمْ ذَرْعًا وَّقَالُوْا لَا تَخَفْ وَلَا تَحْزَنْ ۫ اِنَّا مُنَجُّوْكَ

وَأَهْلَكَ إِلَّا امْرَأَتَكَ كَانَتْ مِنَ الْغَابِرِينَ ﴿٣٤﴾

නියතවශයෙන්ම අපි ඔබගේ බිරිඳ හැර, ඔබවද ඔබගේ පවුලේ අයවද මුදවා ගන්නෙමු. ඇය පසුබසින්නන් ගෙන් වූවායැ'යි කීහ.

إِنَّا مُنْزِلُونَ عَلَىٰ أَهْلِ هَٰذِهِ الْقَرْيَةِ رِجْزًا مِنَ السَّمَاءِ بِمَا كَانُوا يَفْسُقُونَ ﴿٣٥﴾

35. 'නියතවශයෙන්ම අපි මෙම නගරයේ ජනතාව කෙරෙහි අහසින් දඬුවමක් ගෙන එන්නෙමු. මන්ද ඔවුන් කැරලිකරුවන් වූ නිසායැ'(යිද කීහ).

وَلَقَدْ تَرَكْنَا مِنْهَا آيَةً بَيِّنَةً لِقَوْمٍ يَعْقِلُونَ ﴿٣٦﴾

36. තවද අපි එයින් පැහැදිලි සළකුණක් වටහා ගන්නා මිනිසුන්හට හැර දමා ඇත්තෙමු.

وَإِلَىٰ مَدْيَنَ أَخَاهُمْ شُعَيْبًا فَقَالَ يَا قَوْمِ اعْبُدُوا اللَّهَ وَارْجُوا الْيَوْمَ الْآخِرَ وَلَا تَعْثَوْا فِي الْأَرْضِ مُفْسِدِينَ ﴿٣٧﴾

37. තවද (අපි) මද්යන් වෙත ඔහුගේ සොහොයුරු ෂුඅයිබ්(ව යැව්වෙමු). ඔහු, 'එම්බල මාගේ ජනතාවනි! අල්ලාහ්ට නමදිනු. තවද අවසාන දිනයට බිය වනු. තවද පොළොවෙහි කලබල ඇතිකරන්නන් වී අයුක්තිගරුක නොවනු'යි පැවසුවේය.

فَكَذَّبُوهُ فَأَخَذَتْهُمُ الرَّجْفَةُ فَأَصْبَحُوا فِي دَارِهِمْ جَاثِمِينَ ﴿٣٨﴾

38. නමුත් ඔවුහු ඔහුව මුසාවාදියෙකු ලෙස සැළකූහ. එබැවින් දරුණු භූමි කම්පාවක් ඔවුන්ව හසු කර ගත්තේය. තවද ඔවුහු සිය නිවෙස් තුල මුණින් වැටී සිටියහ.

وَعَادًا وَثَمُودَ وَقَدْ تَبَيَّنَ لَكُمْ مِنْ مَسَاكِنِهِمْ ۖ وَزَيَّنَ لَهُمُ الشَّيْطَانُ أَعْمَالَهُمْ فَصَدَّهُمْ عَنِ السَّبِيلِ وَكَانُوا مُسْتَبْصِرِينَ ﴿٣٩﴾

39. තවද (අපි) ආද් සහ සමූද්ව (විනාශ කළෙමු). තවද එය ඔවුන්ගේ වාසස්ථාන වලින් නුඹලාට පැහැදිලිය. තවද ෂෙයිතාන් ඔවුන්ගේ ක්‍රියාවන් ඔවුන්ට අලංකාර කොට පෙන්වූයේය. ඔවුන්ට (සත්‍යය) පැහැදිලිව දැකගත හැකි වුවද ඔහු ඔවුන්ව මාර්ගයෙන් ඉවතට හැරෙව්වේය.

وَقَارُونَ وَفِرْعَوْنَ وَهَامَانَ ۖ وَلَقَدْ جَاءَهُمْ مُوسَىٰ بِالْبَيِّنَاتِ فَاسْتَكْبَرُوا فِي الْأَرْضِ وَمَا كَانُوا سَابِقِينَ ﴿٤٠﴾

40. තවද (අපි) කාරූන්වද ෆිර්අවුන්වද හාමාන්වද (විනාශ කළෙමු). තවද මූසා ඔවුන් වෙත පැහැදිලි සළකුණු සමග පැමිණියේය. නමුත් ඔවුන් පොළොවෙහි උඩඟු ලෙස හැසිරුණහ. එසේ වුවද ඔවුනට (අපව) අභිබවා යෑමට නොහැකි විය.

فَكُلًّا اَخَذۡنَا بِذَنۡۢبِهٖ ۚ فَمِنۡهُمۡ مَّنۡ اَرۡسَلۡنَا عَلَيۡهِ حَاصِبًا ۚ وَمِنۡهُمۡ مَّنۡ اَخَذَتۡهُ الصَّيۡحَةُ ۚ وَمِنۡهُمۡ مَّنۡ خَسَفۡنَا بِهِ الۡاَرۡضَ ۚ وَمِنۡهُمۡ مَّنۡ اَغۡرَقۡنَا ۚ وَمَا كَانَ اللّٰهُ لِيَظۡلِمَهُمۡ وَلٰكِنۡ كَانُوۡۤا اَنۡفُسَهُمۡ يَظۡلِمُوۡنَ ﴿٤١﴾

41. එබැවින් අපි ඔවුන්ගෙන් එකිනෙකාව ඔවුන්ගේ පාපය නිසා හසු කරගත්තෙමු. අප දරුණු වැලි කුණාටු යැවූ අයද ඔවුන්ගෙන් වූහ. තවද බිහිසුනු ගිගුරුම වටලාගත් අයද ඔවුන්ගෙන් වූහ. තවද අප පොළොව ගිලගන්නට සැලැස්වූ අයද ඔවුන්ගෙන් වූහ. තවද අප ගිල්වූ අයද ඔවුන්ගෙන් වූහ. තවද අල්ලාහ් ඔවුනට වැරදි නොකළේය. නමුත් ඔවුන් තමන්ටම වැරදි කර ගත්හ.

مَثَلُ الَّذِيۡنَ اتَّخَذُوۡا مِنۡ دُوۡنِ اللّٰهِ اَوۡلِيَآءَ كَمَثَلِ الۡعَنۡكَبُوۡتِ ۖۚ اِتَّخَذَتۡ بَيۡتًا ؕ وَاِنَّ اَوۡهَنَ الۡبُيُوۡتِ لَبَيۡتُ الۡعَنۡكَبُوۡتِ ۘ لَوۡ كَانُوۡا يَعۡلَمُوۡنَ ﴿٤٢﴾

42. අල්ලාහ් හැරෙන්නට අන් උදව්කරුවන්ව ගන්නා අයගේ උපමාව, නිවසක් සාදාගත් මකුළුවකුගේ උපමාවට සමානය. තවද නියතවශයෙන්ම සියළු නිවෙස් වලින් ඉතාම දුර්වල වන්නේ මකුළුවාගේ නිවසය. අහෝ! ඔවුන් දැන සිටියා නම්!

اِنَّ اللّٰهَ يَعۡلَمُ مَا يَدۡعُوۡنَ مِنۡ دُوۡنِهٖ مِنۡ شَىۡءٍ ؕ وَهُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ ﴿٤٣﴾

43. සැබැවින්ම ඔහු(අල්ලාහ්) හැරෙන්නට ඔවුන් කැඳවන දේ අල්ලාහ් දන්නේමය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَتِلۡكَ الۡاَمۡثَالُ نَضۡرِبُهَا لِلنَّاسِ ۚ وَمَا يَعۡقِلُهَاۤ اِلَّا الۡعٰلِمُوۡنَ ﴿٤٤﴾

44. තවද මේවා අපි මිනිසුන් සඳහා ගෙන හැර දක්වන උපමාවන් වේ. නමුත් දැනුම ඇත්තන් පමණක් ඒවා තේරුම් ගනිති.

خَلَقَ اللّٰهُ السَّمٰوٰتِ وَالۡاَرۡضَ بِالۡحَقِّ ؕ اِنَّ فِىۡ ذٰلِكَ لَاٰيَةً لِّلۡمُؤۡمِنِيۡنَ ﴿٤٥﴾

45. අල්ලාහ් අහස් සහ පොළොව සත්‍ය සමග මැව්වේය. නියතවශයෙන්ම එහි විශ්වාසීතයින්ට සළකුණක් ඇත.

21-කොටස

اُتۡلُ مَاۤ اُوۡحِىَ اِلَيۡكَ مِنَ الۡكِتٰبِ وَاَقِمِ الصَّلٰوةَ ؕ اِنَّ الصَّلٰوةَ تَنۡهٰى عَنِ الۡفَحۡشَآءِ

46. ඔබ වෙත අනාවරණය කරන ලද ග්‍රන්ථයෙන් පාරායණය කරන්න. තවද නමස්කාරයෙහි නිරතවන්න. නියතවශයෙන්ම නමස්කාරය

وَالْمُنْكَرِ ؕ وَلَذِكْرُ اللّٰهِ اَكْبَرُ ؕ وَاللّٰهُ يَعْلَمُ مَا تَصْنَعُوْنَ ﴿٤٦﴾

අශික්ෂිත බවින්ද ප්‍රත්‍යක්ෂ නපුරෙන්ද (කෙනෙකුව) වළක්වයි. තවද අල්ලාහ්ව සිහිකිරීම ඇත්තෙන්ම ශ්‍රේෂ්ඨතම (යහපතකි). තවද නුඹලා කරන දේ අල්ලාහ් දන්නේය.

وَلَا تُجَادِلُوْۤا اَهْلَ الْكِتٰبِ اِلَّا بِالَّتِىْ هِىَ اَحْسَنُ ۖ اِلَّا الَّذِيْنَ ظَلَمُوْا مِنْهُمْ وَقُوْلُوْۤا اٰمَنَّا بِالَّذِىْۤ اُنْزِلَ اِلَيْنَا وَاُنْزِلَ اِلَيْكُمْ وَاِلٰهُنَا وَاِلٰهُكُمْ وَاحِدٌ وَّنَحْنُ لَهٗ مُسْلِمُوْنَ ﴿٤٧﴾

47. වඩාත් හොඳ දේ සමග මිස පුස්තකය ලත් ජනතාව සමග වාද නොකරනු. නමුත් ඔවුන්ගෙන් අයුක්තිගරුක වන්නන් හැරය. (ඔවුන් සමග කොහෙත්ම වාද නොකරනු). තවද, 'අප වෙත අනාවරණය කර ඇති දේ කෙරෙහිද නුඹලා වෙත අනාවරණය කර ඇති දේ කෙරෙහිද අපි විශ්වාස කරමු. තවද අපගේ දෙවියන් මෙන්ම නුඹලාගේ දෙවියන්ද එකම(දෙවියන්)ය. තවද අපි ඔහුට අවනත වන්නෙමු'යි පවසනු.

وَكَذٰلِكَ اَنْزَلْنَاۤ اِلَيْكَ الْكِتٰبَ ؕ فَالَّذِيْنَ اٰتَيْنٰهُمُ الْكِتٰبَ يُؤْمِنُوْنَ بِهٖ ۚ وَمِنْ هٰۤؤُلَاۤءِ مَنْ يُّؤْمِنُ بِهٖ ؕ وَمَا يَجْحَدُ بِاٰيٰتِنَاۤ اِلَّا الْكٰفِرُوْنَ ﴿٤٨﴾

48. තවද මෙලෙස අපි ඔබ වෙත ග්‍රන්ථය පහළ කළෙමු. එබැවින් අප පුස්තකය දුන් අයද මේ (කුර්ආනය) කෙරෙහි විශ්වාස කරති. තවද මොවුන්ගෙන් (මක්කාවාසීන්ගෙන්) ඇතැම් අයද මේ කෙරෙහි විශ්වාස කරති. තවද අවිශ්වාසිතයින් මිස අන්කිසිවෙක් අපගේ සළකුණු ප්‍රතික්ෂේප නොකරති.

وَمَا كُنْتَ تَتْلُوْا مِنْ قَبْلِهٖ مِنْ كِتٰبٍ وَّلَا تَخُطُّهٗ بِيَمِيْنِكَ اِذًا لَّارْتَابَ الْمُبْطِلُوْنَ ﴿٤٩﴾

49. තවද මීට පෙර ඔබ කිසිදු පුස්තකයක් පාරායනා කළේ නැත. තවද ඔබගේ දකුණතින් එවැන්නක් ඔබ ලිව්වේද නැත. එසේවුණි නම් මුසාවාදීන් (ඔබ ගැන) සැක කරන්නට තිබුණි.

بَلْ هُوَ اٰيٰتٌۢ بَيِّنٰتٌ فِىْ صُدُوْرِ الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ ؕ وَمَا يَجْحَدُ بِاٰيٰتِنَاۤ اِلَّا الظّٰلِمُوْنَ ﴿٥٠﴾

50. එහෙත්, මෙය දැනුම දෙන ලද අයගේ හදවත්හි ඇති පැහැදිලි සළකුණුය. තවද වරදකරුවන් මිස අන් කිසිවෙක් අපගේ සළකුණු ප්‍රතික්ෂේප නොකරන්නෝය.

وَقَالُوْا لَوْلَاۤ اُنْزِلَ عَلَيْهِ اٰيٰتٌ مِّنْ رَّبِّهٖ ؕ

51. තවද ඔවුහු 'ඔහුගේ අධිපතියාණන් වෙතින් ඔහු වෙතට

قُلْ إِنَّمَا الْآيَاتُ عِنْدَ اللَّهِ ۖ وَإِنَّمَا أَنَا نَذِيرٌ مُبِينٌ ﴿٥١﴾

සළකුණු පහළ නොකරනු ලැබුවේ මක් නිසාදැ?'යි පවසති. 'එම සළකුණු අල්ලාහ් වෙතය. තවද ස්ථිරවශයෙන්ම මම ප්‍රත්‍යක්ෂ අවවාදකරුවෙක් වෙමි'යි පවසන්න.

أَوَلَمْ يَكْفِهِمْ أَنَّا أَنْزَلْنَا عَلَيْكَ الْكِتَابَ يُتْلَىٰ عَلَيْهِمْ ۚ إِنَّ فِي ذَٰلِكَ لَرَحْمَةً وَذِكْرَىٰ لِقَوْمٍ يُؤْمِنُونَ ﴿٥٢﴾

52. ඔවුන් වෙත පාරායනා කරනු ලබන ග්‍රන්ථය අපි ඔබට පහළ කර තිබීම ඔවුනට ප්‍රමාණවත් නොවේද? සැබැවින්ම මෙහි විශ්වාස කරන ජනතාවට දයාවද අනුශාසනාවද ඇත.

قُلْ كَفَىٰ بِاللَّهِ بَيْنِي وَبَيْنَكُمْ شَهِيدًا ۖ يَعْلَمُ مَا فِي السَّمَاوَاتِ وَالْأَرْضِ ۗ وَالَّذِينَ آمَنُوا بِالْبَاطِلِ وَكَفَرُوا بِاللَّهِ أُولَٰئِكَ هُمُ الْخَاسِرُونَ ﴿٥٣﴾

53. පවසන්න, 'මා හා නුඹලා අතර සාක්ෂිකරුවෙකු ලෙස අල්ලාහ් ප්‍රමාණවත්ය. ඔහු අහස් මෙන්ම පොළොවෙහි ඇති දේ දන්නේය. තවද මුසාවාදය කෙරෙහි විශ්වාස කර අල්ලාහ් කෙරෙහි අවිශ්වාස කරන අය (ගත් කළ) ඔවුන්ම පාඩු විඳින්නන් වෙති'.

وَيَسْتَعْجِلُونَكَ بِالْعَذَابِ ۚ وَلَوْلَا أَجَلٌ مُسَمًّى لَجَاءَهُمُ الْعَذَابُ ۚ وَلَيَأْتِيَنَّهُمْ بَغْتَةً وَهُمْ لَا يَشْعُرُونَ ﴿٥٤﴾

54. තවද ඔවුන් දඬුවම ඉක්මන් කරවීමට ඔබගෙන් ඉල්ලති. තවද නියමිත කාල පරිච්ඡේදය නොතිබෙන්නට එම දඬුවම ඔවුන් මත පැමිණෙන්නට තිබුණි. තවද ඔවුන් නොදැන සිටියදී එය නියතවශයෙන්ම ඔවුන්ව අනපේක්ෂිතව හසුකරගනු ඇත.

يَسْتَعْجِلُونَكَ بِالْعَذَابِ وَإِنَّ جَهَنَّمَ لَمُحِيطَةٌ بِالْكَافِرِينَ ﴿٥٥﴾

55. ඔවුන් දඬුවම ඉක්මන් කරවීමට ඔබගෙන් ඉල්ලති. නමුත් සැබැවින්ම නිරය අවිශ්වාසිතයින්ව (මෙලහකටත්) වටලාගෙන ඇත.

يَوْمَ يَغْشَاهُمُ الْعَذَابُ مِنْ فَوْقِهِمْ وَمِنْ تَحْتِ أَرْجُلِهِمْ وَيَقُولُ ذُوقُوا مَا كُنْتُمْ تَعْمَلُونَ ﴿٥٦﴾

56. දඬුවම ඔවුන්ට ඉහළින්ද ඔවුන්ගේ පාදයන්ට යටින්ද ඔවුන්ව යටපත් කරන එම දිනය (සිහිපත් කරනු). තවද ඔහු, 'නුඹලා කරමින් සිටි දේ නුඹලා විඳිනු'යි කියන්නේය.

يَا عِبَادِيَ الَّذِينَ آمَنُوا إِنَّ أَرْضِي وَاسِعَةٌ

57. එම්බල විශ්වාස කරන්නාවූ මාගේ දාසයිනි! සැබැවින්ම මාගේ පොළොව

| | |
|---|---|
| فَإِيَّاىَ فَاعْبُدُونِ ﴿٥٧﴾ | ව්‍යාප්තය. එබැවින් මා හට පමණක් නමදිනු. |
| كُلُّ نَفْسٍ ذَآئِقَةُ الْمَوْتِ ثُمَّ إِلَيْنَا تُرْجَعُونَ ﴿٥٨﴾ | 58. සෑම ජීවයක්ම මරණය අත්විඳිය යුතුමය. පසුව නුඹලා ආපසු ගෙන එනු ලබන්නේ අප වෙතටය. |
| وَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَنُبَوِّئَنَّهُم مِّنَ الْجَنَّةِ غُرَفًا تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا نِعْمَ أَجْرُ الْعَامِلِينَ ﴿٥٩﴾ | 59. තවද විශ්වාස කොට යහපත් ක්‍රියා කළ අය ගත්කල අපි ඔවුන්ව නියතවශයෙන්ම ස්වර්ගයේ සුවිසල් මන්දිරයන්හි පදිංචි කරවන්නෙමු. ඒවායෙහි යටින් ගංගාවන් ගලාබසිති. ඔවුන් ඒවායෙහි සදා වාසය කරන්නෝය. (යහපත්) ක්‍රියා කරන්නන්ගේ තිළිණය අති ශ්‍රේෂ්ඨය. |
| الَّذِينَ صَبَرُوا وَعَلَىٰ رَبِّهِمْ يَتَوَكَّلُونَ ﴿٦٠﴾ | 60. ඔවුන් ඉවසිලිවන්ත අය වෙති. තවද ඔවුන් තමන්ගේ අධිපතියාණන් කෙරෙහි විශ්වාස තබන්නෝය. |
| وَكَأَيِّن مِّن دَابَّةٍ لَّا تَحْمِلُ رِزْقَهَا اللَّهُ يَرْزُقُهَا وَإِيَّاكُمْ وَهُوَ السَّمِيعُ الْعَلِيمُ ﴿٦١﴾ | 61. තවද තමන්ගේම ආහාර උසුලාගෙන නොයන කොපමණ සත්වයින් සිටිත්ද! අල්ලාහ් උන්ටද නුඹලාටද ජීවනෝපාය සපයන්නේය. තවද ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය. |
| وَلَئِن سَأَلْتَهُم مَّنْ خَلَقَ السَّمَاوَاتِ وَالْأَرْضَ وَسَخَّرَ الشَّمْسَ وَالْقَمَرَ لَيَقُولُنَّ اللَّهُ فَأَنَّىٰ يُؤْفَكُونَ ﴿٦٢﴾ | 62. තවද 'අහස් සහ පොළොව මවා, ඉරත් හඳත් සේවයට යෙදෙව්වේ කවුරුන්ද?'යි ඔබ ඔවුන්ගෙන් ඇසුවහොත්, නියතවශයෙන්ම ඔවුන්, 'අල්ලාහ්යැ'යි කියනු ඇත. එසේ නම් ඔවුන් (සත්‍යයෙන්) හරවනු ලබන්නේ කොයි බටද? |
| اللَّهُ يَبْسُطُ الرِّزْقَ لِمَن يَشَاءُ مِنْ عِبَادِهِ وَيَقْدِرُ لَهُ إِنَّ اللَّهَ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿٦٣﴾ | 63. අල්ලාහ් ඔහුගේ දාසයින්ගෙන් ඔහු අභිමත අයට ජීවනෝපාය වැඩි කර දෙන්නේය. තවද (ඔහු අභිමත) අයට (ඒවා) අඩුකර දෙන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියළු දෙයෙහි පරිපූර්ණ දැනුම ඇත්තාය. |
| وَلَئِن سَأَلْتَهُم مَّن نَّزَّلَ مِنَ السَّمَاءِ مَاءً | 64. තවද 'අහසින් ජලය පහළ කර |

فَاَحۡيَا بِهِ الۡاَرۡضَ مِنۡۢ بَعۡدِ مَوۡتِهَا لَيَقُوۡلُنَّ اللّٰهُ ؕ قُلِ الۡحَمۡدُ لِلّٰهِ ؕ بَلۡ اَكۡثَرُهُمۡ لَا يَعۡقِلُوۡنَ ﴿٦٤﴾

එමගින් පොළොවට එහි මරණින් පසු ජීවය දෙන්නේ කවුරුන්ද?'යි ඔබ ඔවුන්ගෙන් ඇසුවහොත් නියතවශයෙන්ම ඔවුන්, 'අල්ලාහ්යැ'යි කියනු ඇත. පවසන්න, 'සියළු ප්‍රසංශා අල්ලාහ්ටම අයත්ය'. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය වටහා නොගන්නෝය.

وَمَا هٰذِهِ الۡحَيٰوةُ الدُّنۡيَاۤ اِلَّا لَهۡوٌ وَّلَعِبٌ ؕ وَاِنَّ الدَّارَ الۡاٰخِرَةَ لَهِىَ الۡحَيَوَانُ ۘ لَوۡ كَانُوۡا يَعۡلَمُوۡنَ ﴿٦٥﴾

65. තවද මෙලොව ජීවිතය විනෝදය සහ කෙළි සෙල්ලමක් මිස නැත. තවද නියතවශයෙන් පරලොවේ නිවහනම සැබෑ ජීවිතය වේ. අහෝ ! ඔවුන් දැන සිටියා නම්!

فَاِذَا رَكِبُوۡا فِى الۡفُلۡكِ دَعَوُا اللّٰهَ مُخۡلِصِيۡنَ لَهُ الدِّيۡنَ ۚ فَلَمَّا نَجّٰهُمۡ اِلَى الۡبَرِّ اِذَا هُمۡ يُشۡرِكُوۡنَ ۙ ﴿٦٦﴾

66. තවද ඔවුන් නැවට ගොඩ වූ විට, ඔවුන් අල්ලාහ්ව ඔහුට අවංක වෙමින්ද මුළුමනින්ම විශ්වාසවන්ත වෙමින්ද කැඳවන්නෝය. නමුත් ඔහු ඔවුන්ව සුරක්ෂිතව ගොඩබිම කරා ගෙන ආ විට, එවෙලෙහිම ඔවුන් (ඔහුට) සමානයන් තබන්නෝය.

لِيَكۡفُرُوۡا بِمَاۤ اٰتَيۡنٰهُمۡ ۚ وَلِيَتَمَتَّعُوۡا ۚ فَسَوۡفَ يَعۡلَمُوۡنَ ﴿٦٧﴾

67. එය අපි ඔවුන් හට පිරිනැමූ දේ ඔවුන් ප්‍රතික්ෂේප කරනු පිණිසද, (කලකට) ඔවුන් භුක්ති විඳිනු පිණිසද වේ. නමුත් ඔවුන් ඉක්මනින්ම දැනගන්නෝය.

اَوَلَمۡ يَرَوۡا اَنَّا جَعَلۡنَا حَرَمًا اٰمِنًا وَّيُتَخَطَّفُ النَّاسُ مِنۡ حَوۡلِهِمۡ ؕ اَفَبِالۡبَاطِلِ يُؤۡمِنُوۡنَ وَبِنِعۡمَةِ اللّٰهِ يَكۡفُرُوۡنَ ﴿٦٨﴾

68. ඔවුන් අවටවූ මිනිසුන් පැහැරගනු ලබද්දී, අප ඔවුන් සඳහා සුරක්ෂිත අභය භූමියක් ඇති කළ බව ඔවුන් දැක නොතිබේද? ඉන්පසුවත්, ඔවුන් අසත්‍යය විශ්වාස කර අල්ලාහ්ගේ අනුග්‍රහය ප්‍රතික්ෂේප කරන්නෝද?

وَمَنۡ اَظۡلَمُ مِمَّنِ افۡتَرٰى عَلَى اللّٰهِ كَذِبًا اَوۡ كَذَّبَ بِالۡحَقِّ لَمَّا جَآءَهٗ ؕ اَلَيۡسَ فِىۡ جَهَنَّمَ مَثۡوًى لِّلۡكٰفِرِيۡنَ ﴿٦٩﴾

69. තවද අල්ලාහ් සම්බන්ධව බොරුවක් ගොතන හෝ සත්‍යය තමා වෙතට පැමිණි විට එය ප්‍රතික්ෂේප කරන්නාට වඩා අදමිටුවා වන්නේ කවරෙක්ද? අවිශ්වාසිතයින්හට නිරයේ වාසස්ථානයක් නොමැත්තේද?

وَالَّذِينَ جَاهَدُوا فِينَا لَنَهْدِيَنَّهُمْ سُبُلَنَا ۚ وَإِنَّ اللَّهَ لَمَعَ الْمُحْسِنِينَ ٧٠

70. තවද අපගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදෙන්නන් ගත් කල අපි නියතවශයෙන්ම ඔවුන්ව අපගේ මාර්ගයෙහි මග පෙන්වන්නෙමු. තවද සැබැවින්ම අල්ලාහ් යහපත කරන්නන් සමග සිටින්නේය.



අල් රූම්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓ ②

2. අලිෆ්, ලාම්, මීම්. ◆

غُلِبَتِ الرُّوۡمُ ③

3. රෝමවරු පරාජය කරන ලද්දෝය.

فِىۡۤ اَدۡنَى الۡاَرۡضِ وَهُمۡ مِّنۡۢ بَعۡدِ غَلَبِهِمۡ سَيَغۡلِبُوۡنَ ④

4. සමීපව ඇති භූමියෙහි, තවද ඔවුන් තමන්ගේ පරාජයෙන් පසුව ජයග්‍රාහී වන්නෝය.

فِىۡ بِضۡعِ سِنِيۡنَ ؕ لِلّٰهِ الۡاَمۡرُ مِنۡ قَبۡلُ وَمِنۡۢ بَعۡدُ ؕ وَيَوۡمَٮِٕذٍ يَّفۡرَحُ الۡمُؤۡمِنُوۡنَ ⑤

5. වසර කිහිපයකදීය. පෙරත් පසුවත් විධානය අල්ලාහ්ගේය. තවද එදින විශ්වාසිතයින් ප්‍රීති වන්නෝය.

بِنَصۡرِ اللّٰهِ ؕ يَنۡصُرُ مَنۡ يَّشَآءُ ؕ وَهُوَ الۡعَزِيۡزُ الرَّحِيۡمُ ⑥

6. අල්ලාහ්ගේ උදව්වෙන්ය. ඔහු අභිමත අයට ඔහු උදව් කරන්නේය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَعۡدَ اللّٰهِ ؕ لَا يُخۡلِفُ اللّٰهُ وَعۡدَهٗ وَلٰـكِنَّ اَكۡثَرَ النَّاسِ لَا يَعۡلَمُوۡنَ ⑦

7. (මෙය) අල්ලාහ්ගේ පොරොන්දුවයි. අල්ලාහ් තම පොරොන්දුව කඩ නොකරන්නේය. නමුත් මිනිසුන්ගෙන් බොහෝ අය නොදනිති.

يَعۡلَمُوۡنَ ظَاهِرًا مِّنَ الۡحَيٰوةِ الدُّنۡيَا ۖۚ وَهُمۡ عَنِ الۡاٰخِرَةِ هُمۡ غٰفِلُوۡنَ ⑧

8. ඔවුන් මෙලෝ ජීවිතයේ පිටස්තර (අංගය පමණක්) දනිති. තවද ඔවුන් පරලොව ගැන මුළුමනින්ම නොසැලකිලිමත්ය.

اَوَلَمۡ يَتَفَكَّرُوۡا فِىۡۤ اَنۡفُسِهِمۡ ۗ مَا خَلَقَ اللّٰهُ السَّمٰوٰتِ وَالۡاَرۡضَ وَمَا بَيۡنَهُمَاۤ اِلَّا بِالۡحَـقِّ وَاَجَلٍ مُّسَمًّى ؕ وَاِنَّ كَثِيۡرًا مِّنَ النَّاسِ

9. ඔවුන් තමන්ගේම සිත් තුල මෙනෙහි නොකරන්නේද? අල්ලාහ් අහස්ද පොළොවද ඒ දෙක අතර සියල්ලද මවා ඇත්තේ සත්‍යය සමග සහ නියමිත කාල පරිච්ඡේදය සඳහා මිස නැත. නමුත් මිනිසුන් අතර බොහෝ අය තමන්ගේ අධිපතියාණන්

◆ මම අල්ලාහ් සියල්ල දන්නා වෙමි.

بِلِقَآئِ رَبِّهِمْ لَكٰفِرُوْنَ ۝٩

හමුවීම ගැන විශ්වාස නොකරන්නන් වෙති.

اَوَلَمْ يَسِيْرُوْا فِى الْاَرْضِ فَيَنْظُرُوْا كَيْفَ كَانَ عَاقِبَةُ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ ؕ كَانُوْۤا اَشَدَّ مِنْهُمْ قُوَّةً وَّاَثَارُوا الْاَرْضَ وَعَمَرُوْهَاۤ اَكْثَرَ مِمَّا عَمَرُوْهَا وَجَآءَتْهُمْ رُسُلُهُمْ بِالْبَيِّنٰتِ ؕ فَمَا كَانَ اللّٰهُ لِيَظْلِمَهُمْ وَلٰكِنْ كَانُوْۤا اَنْفُسَهُمْ يَظْلِمُوْنَ ؕ ۝١٠

10. ඔවුන්ට පෙර සිටි අයගේ අවසානය කොතරම් (නපුරු) වූයේ දැයි ඔවුන් දැක ගනු පිණිස පොළොවෙහි සංචාරය නොකළේද? ඔවුන්, මොවුනට වඩා බලයෙන් ශක්තිමත් වූහ. තවද ඔවුන් පොළොව අස්වැද්දූහ. එහි මොවුන් ඇති කළ ජනාවාසයට වඩා ඔවුන් (වැඩියෙන්) ජනාවාස ඇති කළහ. එමෙන්ම ඔවුන්ගේ දූතයින් ඔවුන් වෙත ප්‍රත්‍යක්ෂ සළකුණු සමග පැමිණියහ. තවද අල්ලාහ් ඔවුනට වරදක් නොකළේය. නමුත් ඔවුන් තමන්ටම වැරදි කරගත්හ.

ثُمَّ كَانَ عَاقِبَةَ الَّذِيْنَ اَسَآءُوا السُّوْۤاٰۤى اَنْ كَذَّبُوْا بِاٰيٰتِ اللّٰهِ وَكَانُوْا بِهَا يَسْتَهْزِءُوْنَ ۝١١ ع

11. පසුව නපුරුකම් කළ අයගේ අවසානය නපුරම විය. මන්ද ඔවුන් අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කර ඒවාට සරදම් කළ බැවිනි.

اَللّٰهُ يَبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيْدُهٗ ثُمَّ اِلَيْهِ تُرْجَعُوْنَ ۝١٢

12. අල්ලාහ් මැවීම ආරම්භ කරන්නේය. පසුව ඔහු එය නැවත නැවතත් කරන්නේය. පසුව නුඹලා ආපසු ගෙන එනු ලබන්නේ ඔහු වෙතටය.

وَيَوْمَ تَقُوْمُ السَّاعَةُ يُبْلِسُ الْمُجْرِمُوْنَ ۝١٣

13. තවද එම (අවසන්) හෝරාව පැමිණෙන දිනයේදී වරදකරුවන් බලාපොරොත්තු සුන් කර ගනු ඇත.

وَلَمْ يَكُنْ لَّهُمْ مِّنْ شُرَكَآئِهِمْ شُفَعٰٓؤُا وَكَانُوْا بِشُرَكَآئِهِمْ كٰفِرِيْنَ ۝١٤

14. තවද ඔවුන් (දෙවියන්ට) තැබූ සමානයන්ගෙන් කිසිම මැදිහත් වන්නන් ඔවුනට නොවනු ඇත. තවද ඔවුන් (දෙවියන්ට) තැබූ සමානයන්ව ප්‍රතික්ෂේප කරනු ඇත.

وَيَوْمَ تَقُوْمُ السَّاعَةُ يَوْمَئِذٍ يَّتَفَرَّقُوْنَ ۝١٥

15. තවද එදින එම (අවසන්) හෝරාව පැමිණෙන විට එදින ඔවුන් (එකිනෙකාගෙන්) වෙන් වන්නෝය.

فَاَمَّا الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ فَهُمْ فِيْ رَوْضَةٍ يُّحْبَرُوْنَ ﴿١٦﴾

16. පසුව විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කළ අය ගත්කල ඔවුන් ගෞරවයට පාත්‍ර වී උද්‍යානයෙහි ප්‍රමෝදයට පත් කරනු ලබන්නෝය.

وَاَمَّا الَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَا وَلِقَآئِ الْاٰخِرَةِ فَاُولٰٓئِكَ فِي الْعَذَابِ مُحْضَرُوْنَ ﴿١٧﴾

17. නමුත් අවිශ්වාස කොට අපගේ සළකුණු සහ පරලොවේ හමුවීම ප්‍රතික්ෂේප කළ අය ගත්කල ඔවුන් දඬුවමට ඉදිරිපත් කරනු ලබන්නෝය.

فَسُبْحٰنَ اللّٰهِ حِيْنَ تُمْسُوْنَ وَحِيْنَ تُصْبِحُوْنَ ﴿١٨﴾

18. එබැවින් නුඹලා සවස්වරුවෙහි පිවිසෙන විටද නුඹලා හිමිදිරියේ පිබිදෙන විටද අල්ලාහ්ව සුවිශුද්ධ කරනු.

وَلَهُ الْحَمْدُ فِي السَّمٰوٰتِ وَالْاَرْضِ وَعَشِيًّا وَّحِيْنَ تُظْهِرُوْنَ ﴿١٩﴾

19. තවද අහස් මෙන්ම පොළොවෙහි සියළු ප්‍රසංශා ඔහුට අයත්ය. තවද රාත්‍රියෙහි මෙන්ම නුඹලා දිවා කාලයෙහි පිවිසෙන විටද (ඔහුව සුවිශුද්ධ කරනු.)

يُخْرِجُ الْحَيَّ مِنَ الْمَيِّتِ وَيُخْرِجُ الْمَيِّتَ مِنَ الْحَيِّ وَيُحْيِ الْاَرْضَ بَعْدَ مَوْتِهَا ؕ وَكَذٰلِكَ تُخْرَجُوْنَ ﴿٢٠﴾ ع

20. ඔහු අජීවයෙන් ජීවය හෙළි කරන්නේය. එමෙන්ම ඔහු ජීවයෙන් අජීවය හෙළි කරන්නේය. තවද ඔහු පොළොවට එහි මරණින් පසු ජීවය දෙන්නේය. තවද මෙයාකාරයට නුඹලා පිට කරනු ලබන්නෝය.

وَمِنْ اٰيٰتِهٖٓ اَنْ خَلَقَكُمْ مِّنْ تُرَابٍ ثُمَّ اِذَآ اَنْتُمْ بَشَرٌ تَنْتَشِرُوْنَ ﴿٢١﴾

21. තවද ඔහුගේ සළකුණු වලින් (එකක්) නම් ඔහු නුඹලාව දූවිලි පසින් මැව්වේය. පසුව එවෙලෙහිම නුඹලා මිනිසුන් වී (පොළෝ තලය මත) විසිරී යන්නෙහුය.

وَمِنْ اٰيٰتِهٖٓ اَنْ خَلَقَ لَكُمْ مِّنْ اَنْفُسِكُمْ اَزْوَاجًا لِّتَسْكُنُوْٓا اِلَيْهَا وَجَعَلَ بَيْنَكُمْ مَّوَدَّةً وَّرَحْمَةً ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّقَوْمٍ يَّتَفَكَّرُوْنَ ﴿٢٢﴾

22. තවද ඔහුගේ සළකුණු වලින් (එකක්) නම්, ඔහු නුඹලා අතුරින්ම නුඹලාට බිරිඳන්ව මවා ඇත්තේ, නුඹලා ඔවුන් තුලින් නුඹලාගේ සිතට සැනසුම ලබාගැනීමටත් ඔහු නුඹලා අතර ආදරය සහ කරුණාව ඇති කිරීමටත්ය. එහි නියතවශයෙන්ම වටහා ගන්නා ජනතාවට සළකුණු ඇත.

وَمِنْ اٰيٰتِهٖ خَلْقُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَاخْتِلَافُ اَلْسِنَتِكُمْ وَاَلْوَانِكُمْ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّلْعٰلِمِيْنَ ﴿٢٣﴾

23. තවද ඔහුගේ සළකුණු අතරින් අහස් සහ පොළොව මැවීමත් නුඹලාගේ භාෂාවන් සහ වර්ණ විවිධාකාර වීමත් වේ. එහි නියත වශයෙන්ම දැනුම ඇත්තන් සඳහා සළකුණු ඇත.

وَمِنْ اٰيٰتِهٖ مَنَامُكُمْ بِالَّيْلِ وَالنَّهَارِ وَابْتِغَآؤُكُمْ مِّنْ فَضْلِهٖ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّقَوْمٍ يَّسْمَعُوْنَ ﴿٢٤﴾

24. තවද ඔහුගේ සළකුණු අතුරින් රාත්‍රියේ සහ දහවලේදී නුඹලා නින්දට යැමත් ඔහුගේ වරප්‍රසාදය නුඹලා සොයා යැමත් වේ. එහි නියතවශයෙන්ම සවන් දෙන ජනතාවට සළකුණු ඇත.

وَمِنْ اٰيٰتِهٖ يُرِيْكُمُ الْبَرْقَ خَوْفًا وَّطَمَعًا وَّيُنَزِّلُ مِنَ السَّمَآءِ مَآءً فَيُحْيٖ بِهِ الْاَرْضَ بَعْدَ مَوْتِهَا ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ لِّقَوْمٍ يَّعْقِلُوْنَ ﴿٢٥﴾

25. තවද ඔහුගේ සළකුණු අතරින් බිය සහ බලාපොරොත්තු (ඇති කිරීමක්) ලෙස ඔහු නුඹලාට විදුලි කෙටීම පෙන්වීමද ඔහු අහසින් ජලය පහළ කිරීමද වේ. පසුව ඔහු පෙළොවට එහි මරණින් පසු ජීවය දෙන්නේය. එහි නියතවශයෙන්ම තේරුම්ගන්නා ජනතාවට සළකුණු ඇත.

وَمِنْ اٰيٰتِهٖۤ اَنْ تَقُوْمَ السَّمَآءُ وَالْاَرْضُ بِاَمْرِهٖ ؕ ثُمَّ اِذَا دَعَاكُمْ دَعْوَةً ۖ مِّنَ الْاَرْضِ ۖ اِذَاۤ اَنْتُمْ تَخْرُجُوْنَ ﴿٢٦﴾

26. තවද ඔහුගේ සළකුණු අතුරින් අහස් සහ පොළොව ඔහුගේ විධානයෙන් (ස්ථිරව) පැවතීමය. පසුව ඔහු නුඹලාට පොළොවෙන් හඬක් දුන් විට, එවෙලෙහිම නුඹලා පිටත් වන්නෙහුය.

وَلَهٗ مَنْ فِي السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ كُلٌّ لَّهٗ قٰنِتُوْنَ ﴿٢٧﴾

27. තවද අහස්හිද පොළොවෙහිද වන සියල්ලම ඔහුට අයත් වේ. සියල්ලම ඔහුට අවනතය.

وَهُوَ الَّذِيْ يَبْدَؤُا الْخَلْقَ ثُمَّ يُعِيْدُهٗ وَهُوَ اَهْوَنُ عَلَيْهِ ؕ وَلَهُ الْمَثَلُ الْاَعْلٰى

28. තවද මැවීම ආරම්භ කරන්නේද පසුව එය නැවත නැවතත් කරන්නේද ඔහුමය. එමෙන්ම එය ඔහුට ඉතා පහසුය. අහස් සහ පොළොවෙහි අති උසස් තත්ත්වය

فِي السَّمٰوٰتِ وَالْاَرْضِ ۚ وَهُوَ الْعَزِيْزُ الْحَكِيْمُ ﴿٢٨﴾

ඔහුටමය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

ضَرَبَ لَكُمْ مَّثَلًا مِّنْ اَنْفُسِكُمْ ۗ هَلْ لَّكُمْ مِّنْ مَّا مَلَكَتْ اَيْمَانُكُمْ مِّنْ شُرَكَآءَ فِيْ مَا رَزَقْنٰكُمْ فَاَنْتُمْ فِيْهِ سَوَآءٌ تَخَافُوْنَهُمْ كَخِيْفَتِكُمْ اَنْفُسَكُمْ ۗ كَذٰلِكَ نُفَصِّلُ الْاٰيٰتِ لِقَوْمٍ يَّعْقِلُوْنَ ﴿٢٩﴾

29. ඔහු නුඹලාට නුඹලා සම්බන්ධව උපමාවක් ගෙන හැර දක්වයි. අප නුඹලාට සපයා දී ඇති දෙයෙහි නුඹලාගේ දකුණත් හිමිකරගත් අය නුඹලාට හවුල්කරුවන් වී එමෙන්ම නුඹලා එහි සමාන (කොටස්කරුවන්) වී නුඹලා එකිනෙකාට බිය වන්නා සේ ඔවුන්ට බිය වන්නෙහුද? මෙලෙස අපි තේරුම් ගන්නා ජනතාවට සළකුණු විග්‍රහ කරන්නෙමු.

بَلِ اتَّبَعَ الَّذِيْنَ ظَلَمُوْٓا اَهْوَآءَهُمْ بِغَيْرِ عِلْمٍ ۚ فَمَنْ يَّهْدِيْ مَنْ اَضَلَّ اللّٰهُ ۗ وَمَا لَهُمْ مِّنْ نّٰصِرِيْنَ ﴿٣٠﴾

30. නොඑසේය, නමුත් අයුක්තිගරුක වන අය කිසිදු දැනුමක් නොමැතිව තමන්ගේම පහත් ආශාවන් අනුගමනය කරති. පසුව නොමග ගිය බව අල්ලාහ් තීරණය කළ අයට මග පෙන්විය හැක්කේ කවරෙකුටද? තවද ඔවුන්ට උදව්කරුවන් කිසිවෙකු නොවනු ඇත.

فَاَقِمْ وَجْهَكَ لِلدِّيْنِ حَنِيْفًا ۗ فِطْرَتَ اللّٰهِ الَّتِيْ فَطَرَ النَّاسَ عَلَيْهَا ۗ لَا تَبْدِيْلَ لِخَلْقِ اللّٰهِ ۗ ذٰلِكَ الدِّيْنُ الْقَيِّمُ ۙ وَلٰكِنَّ اَكْثَرَ النَّاسِ لَا يَعْلَمُوْنَ ﴿٣١﴾

*31. එබැවින් ඔබගේ මුහුණ (සත්‍යයට) සදා නැඹුරු වූ ධර්මය දෙසට යොමුකරන්න. (තවද) අල්ලාහ්ගේ ස්වභාවය (අනුගමනය කරන්න). ඒ අනුව ඔහු සියළු මිනිස් වර්ගයාව මැව්වේය. අල්ලාහ්ගේ මැවීමෙහි කිසිදු වෙනස්වීමක් නොමැත. ඇත්තෙන්ම, මෙයම ස්ථිරසාර ඍජු ධර්මය වන්නේය. නමුත් බොහෝ මිනිසුන් නොදනිති.

مُنِيْبِيْنَ اِلَيْهِ وَاتَّقُوْهُ وَاَقِيْمُوا الصَّلٰوةَ

32. (පසුතැවිලිව) ඔහු වෙත

* සටහන. 31: මෙහිදී අල්ලාහ්ගේ ස්වභාවය යනුවෙන් අදහස් කරනුයේ ඔහුගේ ගුණාංගයන් වේ. මෙවැනි පසුතලයකින් අදහස් වන්නේ මිනිසාට අල්ලාහ්ගේ ගුණාංගයන් අනුකරණය කළ හැකි බවයි. මිනිසා අධ්‍යාත්මිකව දියුණු වීමට එකම මග එය වේ. පැහැදිලිවම, මිනිසාගේ මෙම විශේෂිත හැකියාව අන් සත්වයින්ට නොමැත. තවත් ආකාරයට කියතොත්, අල්ලාහ්ගේ සම්පත්වය ලබාගත හැක්කේ ඔහුගේ උතුම් වූ ගුණාංගයක් ඇතිකරගන්නේ නම් පමණි. කෙසේ වෙතත් මෙයද සිත්හි තබා ගත යුතුය. එනම් අල්ලාහ් නිත්‍යය, නමුත් මිනිසා අනිත්‍යය. එබැවින් මිනිසාට ඔහුව අනුකරණය කළ හැකි වනුයේ මිනිස් හැකියාවන්හි මිනිසාගේ සීමාව තුල පමණි.

وَلَا تَكُونُوا مِنَ الْمُشْرِكِينَ ﴿٣٢﴾

හැරෙමින් (නුඹලාගේ මුහුණ දෙවියන් දෙසට යොමුකරනු). තවද ඔහුට බිය බැතිමත් වනු. තවද නමස්කාරය ඉටු කරනු. තවද (දෙවියන්ට) සමාන තබන්නන්ගෙන් නොවනු.

مِنَ الَّذِينَ فَرَّقُوا دِينَهُمْ وَكَانُوا شِيَعًا ۖ كُلُّ حِزْبٍ بِمَا لَدَيْهِمْ فَرِحُونَ ﴿٣٣﴾

33. තමන්ගේ ධර්මය බෙදහින්න කර නිකායන් වලට බෙදී සිටින අයගෙන් සෑම පාර්ශවයක්ම තමන් සතු දේ ගැන ප්‍රමෝදයට පත් වෙති.

وَإِذَا مَسَّ النَّاسَ ضُرٌّ دَعَوْا رَبَّهُمْ مُنِيبِينَ إِلَيْهِ ثُمَّ إِذَا أَذَاقَهُمْ مِنْهُ رَحْمَةً إِذَا فَرِيقٌ مِنْهُمْ بِرَبِّهِمْ يُشْرِكُونَ ﴿٣٤﴾

34. තවද විපතක් මිනිසුන්ට අත්වන කල්හි, ඔවුහු (පසුතැවිලි වී) තමන්ගේ අධිපතියාණන්ව ඔහු වෙතට හැරෙමින් කැඳවති. පසුව ඔහු තමා වෙතින් ඔවුන්ට කරුණාව විඳින්නට සැලැස්වූ කල්හි, එවෙලෙහිම ඔවුන්ගෙන් පිරිසක්, තමන්ගේ අධිපතියාණන්ට සමානයන් තබති.

لِيَكْفُرُوا بِمَا آتَيْنَاهُمْ ۚ فَتَمَتَّعُوا فَسَوْفَ تَعْلَمُونَ ﴿٣٥﴾

35. එය, අප ඔවුන්ට දුන් දෙයට අකෘතඥ වනු පිණිසය. එබැවින් නුඹලා (මොහොතකට) භුක්ති විඳිනු. නමුත් ඉක්මනින්ම නුඹලා දැනගන්නෙහුය.

أَمْ أَنْزَلْنَا عَلَيْهِمْ سُلْطَانًا فَهُوَ يَتَكَلَّمُ بِمَا كَانُوا بِهِ يُشْرِكُونَ ﴿٣٦﴾

36. ඔවුන් ඔහුට සමාන තබන දෙයට (පක්ෂපාතිව) පවසන්නාවූ කිසිදු සාධකයක් අපි ඔවුන්ට පහළ කර ඇත්තෙමුද?

وَإِذَا أَذَقْنَا النَّاسَ رَحْمَةً فَرِحُوا بِهَا ۖ وَإِنْ تُصِبْهُمْ سَيِّئَةٌ بِمَا قَدَّمَتْ أَيْدِيهِمْ إِذَا هُمْ يَقْنَطُونَ ﴿٣٧﴾

37. තවද අපි මිනිසුන්ට කරුණාව විඳින්නට සැලැස්වූ විට ඔවුන් එහි ප්‍රමෝදයට පත් වෙති. නමුත් ඔවුන්ගේම අත් උපයා ඇති දේ හේතුවෙන් ඔවුනට නපුරක් අත්වන විට එසැනින්ම ඔවුන් බලාපොරොත්තු සුන් කරගනිති.

أَوَلَمْ يَرَوْا أَنَّ اللَّهَ يَبْسُطُ الرِّزْقَ لِمَنْ يَشَاءُ وَيَقْدِرُ ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِقَوْمٍ يُؤْمِنُونَ ﴿٣٨﴾

38. අල්ලාහ්, ඔහු අභිමත අයට ජීවනෝපාය වැඩි කර දෙන බවත් ඔහු (අභිමත) අයට අඩුකර දෙන බවත් ඔවුන් දැක නොතිබේද? විශ්වාස කරන ජනතාවට සැබැවින්ම මෙහි සළකුණු ඇත.

39. එබැවින් ඥාතියාට ඔහුගේ අයිතිය දෙනු. එමෙන්ම අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්ටද මගින්ටද (දෙනු). කවුරුන් හෝ අල්ලාහ්ගේ කැමැත්ත සොයන්නේද ඔවුන්ට එය වඩාත් යහපත්ය. තවද ජයග්‍රාහිකයෝ ඔවුන්මය.

فَـَٔاتِ ذَا الْقُرْبٰى حَقَّهٗ وَالْمِسْكِيْنَ وَابْنَ السَّبِيْلِ ؕ ذٰلِكَ خَيْرٌ لِّلَّذِيْنَ يُرِيْدُوْنَ وَجْهَ اللّٰهِ ۫ وَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ۞٣٩

40. තවද මිනිසුන්ගේ ධනයෙහි වර්ධනයක් වේ යැයි නුඹලා පොලියක් ලෙස දීම අල්ලාහ් අභියස වර්ධනය නොවන්නේය. නමුත් නුඹලා අල්ලාහ්ගේ කැමැත්ත පතමින් යම් කිසිවක් 'zසකාත්' (දුගී බද්ද) වශයෙන් ගෙවන්නේද, ඔවුන්ම (තම ධනය) කිහිප ගුණයකින් වැඩිකරගන්නන්ය.

وَمَآ اٰتَيْتُمْ مِّنْ رِّبًا لِّيَرْبُوَا۟ فِيْٓ اَمْوَالِ النَّاسِ فَلَا يَرْبُوْا عِنْدَ اللّٰهِ ۚ وَمَآ اٰتَيْتُمْ مِّنْ زَكٰوةٍ تُرِيْدُوْنَ وَجْهَ اللّٰهِ فَاُولٰٓئِكَ هُمُ الْمُضْعِفُوْنَ ۞٤٠

41. නුඹලාව මවා ඇත්තේ අල්ලාහ්මය. පසුව ඔහු නුඹලාට ජීවනෝපාය දුන්නේය. පසුව ඔහු නුඹලාව මරණයට පත් කරන්නේය. පසුව ඔහු නුඹලාට ජීවය ලබා දෙන්නේය. නුඹලා '(අල්ලාහ්ට) තැබූ සමානයන්ගෙන්' මේ දෙයින් කිසිවක් කළ හැකි කෙනෙකු සිටීද? ඔහු සුවිශුද්ධය, තවද (ඔහු සමග) ඔවුන් සමාන තබන දෙයට වඩා ඔහු අති උසස්ය.

اَللّٰهُ الَّذِيْ خَلَقَكُمْ ثُمَّ رَزَقَكُمْ ثُمَّ يُمِيْتُكُمْ ثُمَّ يُحْيِيْكُمْ ؕ هَلْ مِنْ شُرَكَآئِكُمْ مَّنْ يَّفْعَلُ مِنْ ذٰلِكُمْ مِّنْ شَيْءٍ ؕ سُبْحٰنَهٗ وَتَعٰلٰى عَمَّا يُشْرِكُوْنَ ۞٤١

42. මිනිසුන්ගේ අත් ඉපැයූ දේ හේතුවෙන් පොළොවෙහි මෙන්ම මුහුදෙහිද දූෂණය ඉස්මතු වී ඇත. මේ නිසා ඔවුන් (නපුරෙන්) ආපසු හැරෙනු පිණිස ඔහු ඔවුන් කළ ඇතැම් දේ විඳීමට සලස්වන්නේය.

ظَهَرَ الْفَسَادُ فِى الْبَرِّ وَالْبَحْرِ بِمَا كَسَبَتْ اَيْدِى النَّاسِ لِيُذِيْقَهُمْ بَعْضَ الَّذِيْ عَمِلُوْا لَعَلَّهُمْ يَرْجِعُوْنَ ۞٤٢

43. පවසන්න, 'පොළොවෙහි සංචාරය කරනු. තවද (නුඹලාට) පෙර සිටි අයගේ අවසානය කෙතරම් (නපුරු) වී දැයි බලනු! ඔවුන්ගෙන් වැඩි දෙනෙක් ප්‍රතිමා පුදන්නන් වූහ'.

قُلْ سِيْرُوْا فِى الْاَرْضِ فَانْظُرُوْا كَيْفَ كَانَ عَاقِبَةُ الَّذِيْنَ مِنْ قَبْلُ ؕ كَانَ اَكْثَرُهُمْ مُّشْرِكِيْنَ ۞٤٣

فَاَقِمْ وَجْهَكَ لِلدِّيْنِ الْقَيِّمِ مِنْ قَبْلِ اَنْ يَّاْتِيَ يَوْمٌ لَّا مَرَدَّ لَهٗ مِنَ اللّٰهِ يَوْمَئِذٍ يَّصَّدَّعُوْنَ ﴿٤٤﴾

44. එබැවින් අල්ලාහ්ගෙන් නොවැළැක්විය හැකි දිනය පැමිණීමට පෙර ස්ථිරසාර සෘජු වූ ධර්මය දෙසට ඔබගේ අවධානය යොමු කරන්න. එදින ඔවුන් එකිනෙකාගෙන් ඈත් වූ කණ්ඩායම් වලට යොමු වෙනු ඇත.

مَنْ كَفَرَ فَعَلَيْهِ كُفْرُهٗ ۚ وَمَنْ عَمِلَ صَالِحًا فَلِاَنْفُسِهِمْ يَمْهَدُوْنَ ۙ﴿٤٥﴾

45. අවිශ්වාස කරන්නන් තමන්ගේ අවිශ්වාසය (හේතුවෙන් වන ප්‍රතිවිපාකය) උසුලනු ඇත. තවද ධාර්මිෂ්ඨ ක්‍රියාවන් කරන අය තමන් වෙනුවෙන් (යහපත) සූදානම් කර ගන්නෝය.

لِيَجْزِيَ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ مِنْ فَضْلِهٖ ۗ اِنَّهٗ لَا يُحِبُّ الْكٰفِرِيْنَ ﴿٤٦﴾

46. එය ඔහු තමාගේ වරප්‍රසාදයෙන්, විශ්වාස කොට ධාර්මිෂ්ඨ ක්‍රියාවන් කළ අයට තිළිණය දෙනු පිණිසය. නියතවශයෙන්ම ඔහු අවිශ්වාසිතයින් ප්‍රිය නොකරන්නේය.

وَمِنْ اٰيٰتِهٖٓ اَنْ يُّرْسِلَ الرِّيَاحَ مُبَشِّرٰتٍ وَّلِيُذِيْقَكُمْ مِّنْ رَّحْمَتِهٖ وَلِتَجْرِيَ الْفُلْكُ بِاَمْرِهٖ وَلِتَبْتَغُوْا مِنْ فَضْلِهٖ وَلَعَلَّكُمْ تَشْكُرُوْنَ ﴿٤٧﴾

47. තවද ඔහුගේ සළකුණු අතර (මෙයද) වේ. එනම්, ශුභාරංචි ගෙනෙන්නක් ලෙස ඔහු සුළඟ එවන්නේය. (එය එසේ කරන්නේ) ඔහු නුඹලාට තම දයාව විඳවීම පිණිසද, තම විධානයෙන් නැව් යාත්‍රා කරනු පිණිසද, තම වරප්‍රසාදයෙන් නුඹලා සොයනු පිණිසද, නුඹලා කෘතඥ වනු පිණිසද වේ.

وَلَقَدْ اَرْسَلْنَا مِنْ قَبْلِكَ رُسُلًا اِلٰى قَوْمِهِمْ فَجَآءُوْهُمْ بِالْبَيِّنٰتِ فَانْتَقَمْنَا مِنَ الَّذِيْنَ اَجْرَمُوْا ۗ وَكَانَ حَقًّا عَلَيْنَا نَصْرُ الْمُؤْمِنِيْنَ ﴿٤٨﴾

48. තවද නියතවශයෙන්ම අපි ඔබට පෙර ඔවුන්ගේම ජනතාව වෙත දූතයින් යැව්වෙමු. තවද ඔවුහු පැහැදිලි සළකුණු ඔවුන්ට ගෙන ආවෝය. පසුව වරදකරු වූ අයට අපි දඬුවම් කළෙමු. තවද විශ්වාසිතයින්ට උදව් කිරීම නිශ්චිතවම අප කෙරෙහි වූ යුතුකමකි.

اَللّٰهُ الَّذِيْ يُرْسِلُ الرِّيٰحَ فَتُثِيْرُ سَحَابًا فَيَبْسُطُهٗ فِي السَّمَآءِ كَيْفَ يَشَآءُ وَيَجْعَلُهٗ

49. සුළං එවන්නේ අල්ලාහ්ය. එමගින් ඒවා වළාකුලු නංවන්නේය. පසුව ඔහු කැමති පරිදි ඔහු එය අහස්හි පතුරුවන්නේය. පසුව එය

كِسَفًا فَتَرَى الْوَدْقَ يَخْرُجُ مِنْ خِلٰلِهٖ ۚ فَاِذَآ اَصَابَ بِهٖ مَنْ يَّشَآءُ مِنْ عِبَادِهٖٓ اِذَا هُمْ يَسْتَبْشِرُوْنَ ۚ ﴿٤٩﴾

එක පිට එක තට්ටු වශයෙන් සලස්වන්නේය. තවද ඔබ එහි මධ්‍යයෙන් වැහි නිකුත්වනු දකින්නෙහිය. තවද ඔහුගේ දාසයින්ගෙන් ඔහු අභිමත අය කෙරෙහි එය පතිතවන්නට ඔහු සලස්වන විට එසැනින්ම ඔවුහු ප්‍රීතියෙන් කුල්මත් වන්නෝය.

وَاِنْ كَانُوْا مِنْ قَبْلِ اَنْ يُّنَزَّلَ عَلَيْهِمْ مِّنْ قَبْلِهٖ لَمُبْلِسِيْنَ ﴿٥٠﴾

50. එසේනමුත් එයට පෙරද ඔවුන්මත එය පහළ කරනු ලබන්නට පෙරද ඔවුහු අනපේක්ෂිතව සිටියහ.

فَانْظُرْ اِلٰٓى اٰثٰرِ رَحْمَتِ اللّٰهِ كَيْفَ يُحْيِ الْاَرْضَ بَعْدَ مَوْتِهَا ۭ اِنَّ ذٰلِكَ لَمُحْيِ الْمَوْتٰى ۚ وَهُوَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿٥١﴾

51. එබැවින් අල්ලාහ්ගේ දයාවේ සළකුණු දෙස බලනු. ඔහු පොළොව එහි මරණින් පසු පණ ගන්වන්නේ කෙසේද? සැබැවින්ම මළවුනට ජීවය දෙන්නා ඔහුමය. තවද ඔහු සියලු දේ කෙරෙහි බලසම්පන්නය.

وَلَىِٕنْ اَرْسَلْنَا رِيْحًا فَرَاَوْهُ مُصْفَرًّا لَّظَلُّوْا مِنْۢ بَعْدِهٖ يَكْفُرُوْنَ ﴿٥٢﴾

52. තවද අප සුළඟක් එවා, පසුව ඔවුන් එය (ඔවුන්ගේ අස්වැන්න) කහපැහැ ගැන්වීම දුටුවහොත්, ඉන්පසුව නියතවශයෙන්ම ඔවුන් (අපගේ අනුග්‍රහයන්) ප්‍රතික්ෂේප කරන්නට පටන් ගනිති.

فَاِنَّكَ لَا تُسْمِعُ الْمَوْتٰى وَلَا تُسْمِعُ الصُّمَّ الدُّعَآءَ اِذَا وَلَّوْا مُدْبِرِيْنَ ﴿٥٣﴾

53. එහෙයින් සැබැවින්ම මළවුන් අසන්නට ඔබට සැලැස්විය නොහැක. එමෙන්ම බිහිරින්, පසුබට වන්නන්ව ආපසු හැරී යන විට (ඔබගේ) කැඳවීම (ඔවුනට) අසන්නටද ඔබට සැලැස්විය නොහැක.

وَمَآ اَنْتَ بِهٰدِ الْعُمْيِ عَنْ ضَلٰلَتِهِمْ ۭ اِنْ تُسْمِعُ اِلَّا مَنْ يُّؤْمِنُ بِاٰيٰتِنَا فَهُمْ مُّسْلِمُوْنَ ﴿٥٤﴾ ع ١٣ ٨

54. තවද අන්ධයින්ව ඔවුන්ගේ දුර් මාර්ගයෙන් යහමගට යොමු කිරීම ඔබට කළ නොහැකිය. ඔබට සවන් දෙන්නට සැලැස්විය හැක්කේ අපගේ සළකුණු කෙරෙහි විශ්වාස කරන අයව පමණි. තවද ඔවුන් අවනත වන්නන් වෙති.

55. නුඹලාව දුර්වල (තත්ත්වයක) මැව්වේ අල්ලාහ්මය. තවද දුර්වලතාවයට පසු (නුඹලාට) ශක්තිය දුන්නේය. අනතුරුව ශක්තියට පසු දුර්වලතාවයටද මහලුවියටද පත් කළේය. ඔහු අභිමත දේ ඔහු මවන්නේය. ඔහුම සියල්ල දත්තාය, බලසම්පන්නය.

اَللّٰهُ الَّذِىْ خَلَقَكُمْ مِّنْ ضُعْفٍ ثُمَّ جَعَلَ مِنْۢ بَعْدِ ضُعْفٍ قُوَّةً ثُمَّ جَعَلَ مِنْۢ بَعْدِ قُوَّةٍ ضُعْفًا وَّشَيْبَةً ؕ يَخْلُقُ مَا يَشَآءُ ۚ وَهُوَ الْعَلِيْمُ الْقَدِيْرُ ﴿٥٥﴾

قرأ حفص بضم الضاد وفتحها في الثلاثة لكن الضم مختار

56. තවද (අවසාන) කාලය පැමිණෙන දිනයේදී වරදකරුවන්, තමන් පැයක් මිස කල් ගෙවූයේ නැතැයි දිවුරන්නෝය. මෙලෙස ඔවුහු (යහමගින්) හරවනු ලැබූහ.

وَيَوْمَ تَقُوْمُ السَّاعَةُ يُقْسِمُ الْمُجْرِمُوْنَ ۙ مَا لَبِثُوْا غَيْرَ سَاعَةٍ ؕ كَذٰلِكَ كَانُوْا يُؤْفَكُوْنَ ﴿٥٦﴾

57. නමුත් දැනුමද විශ්වාසයද දෙනු ලැබූ අය, 'නුඹලා ඇත්තෙන්ම අල්ලාහ්ගේ ග්‍රන්ථයට අනුව පුනරුත්ථාන දිනය තෙක් කල් ගෙවා ඇත්තෙහුය. තවද පුනරුත්ථාන දිනය මෙය වේ. නමුත් නුඹලා දැනගන්නට (සැලකිලිමත්) නොවූහ'යි කියන්නෝය.

وَقَالَ الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ وَالْاِيْمَانَ لَقَدْ لَبِثْتُمْ فِىْ كِتٰبِ اللّٰهِ اِلٰى يَوْمِ الْبَعْثِ ؗ فَهٰذَا يَوْمُ الْبَعْثِ وَلٰكِنَّكُمْ كُنْتُمْ لَا تَعْلَمُوْنَ ﴿٥٧﴾

58. එබැවින් එදින වරදකරුවන්ට ඔවුන්ගේ නිදහසට කරුණු පැවසීම එලක් නොවනු ඇත. තවද ඔවුන් සංශෝධනය කරගැනීමටද අවසර දෙනු නොලබන්නෝය.

فَيَوْمَئِذٍ لَّا يَنْفَعُ الَّذِيْنَ ظَلَمُوْا مَعْذِرَتُهُمْ وَلَا هُمْ يُسْتَعْتَبُوْنَ ﴿٥٨﴾

59. තවද ඇත්තෙන්ම අපි මෙම කුර්ආනයෙහි මිනිසුන්හට සෑම ආකාරයේ උපමාවන් ගෙන හැර දක්වා ඇත්තෙමු. තවද ඇත්තෙන්ම ඔබ ඔවුන් වෙත කුමන සළකුණක් ගෙන ආවද, 'නුඹලා මුසාවාදීන්ම වන්නෙහුයැ'යි නියතවශයෙන්ම අවිශ්වාස කළ අය කියන්නෝය.

وَلَقَدْ ضَرَبْنَا لِلنَّاسِ فِىْ هٰذَا الْقُرْاٰنِ مِنْ كُلِّ مَثَلٍ ؕ وَلَئِنْ جِئْتَهُمْ بِاٰيَةٍ لَّيَقُوْلَنَّ الَّذِيْنَ كَفَرُوْۤا اِنْ اَنْتُمْ اِلَّا مُبْطِلُوْنَ ﴿٥٩﴾

60. දැනුම නැති අයගේ හදවත්වලට අල්ලාහ් මුද්‍රා තබන්නේ මෙලෙසය.

كَذٰلِكَ يَطْبَعُ اللّٰهُ عَلٰى قُلُوْبِ الَّذِيْنَ لَا يَعْلَمُوْنَ ﴿٦٠﴾

فَاصْبِرْ اِنَّ وَعْدَ اللّٰهِ حَقٌّ وَّلَا يَسْتَخِفَّنَّكَ الَّذِيْنَ لَا يُوْقِنُوْنَ ﴿٦١﴾

61. එබැවින් ඔබ ඉවසිලිමත් වන්න. නියතවශයෙන්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය වේ. තවද ස්ථිරසාර (විශ්වාසයක්) නොමැති අය ඔබව සුළුකොට නොගනිත්වා!



ලුක්මාන්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓ ②

2. අලිෆ්, ලාම්, මීම්. ◆

تِلۡكَ اٰيٰتُ الۡكِتٰبِ الۡحَكِيۡمِ ③

3. මේවා ප්‍රඥාවන්ත ග්‍රන්ථයෙහි වාක්‍යයන් වේ.

هُدًى وَّ رَحۡمَةً لِّلۡمُحۡسِنِيۡنَ ④

4. යහකම් කරන්නන්ට මග පෙන්වීමක්ද දයාවක්ද වේ.

الَّذِيۡنَ يُقِيۡمُوۡنَ الصَّلٰوةَ وَيُؤۡتُوۡنَ الزَّكٰوةَ وَهُمۡ بِالۡاٰخِرَةِ هُمۡ يُوۡقِنُوۡنَ ⑤

5. ඔවුන් නමස්කාරයෙහි නිරතවන්නන්ද zසකාත් (දුගී බද්ද) ගෙවන්නන්ද පරලොව කෙරෙහි දැඩිව විශ්වාස කරන්නන්ද වෙති.

اُولٰٓئِكَ عَلٰى هُدًى مِّنۡ رَّبِّهِمۡ وَاُولٰٓئِكَ هُمُ الۡمُفۡلِحُوۡنَ ⑥

6. තම අධිපතියාණන්ගෙන් වන යහමග අනුගමනය කරන්නන් ඔවුන්මය. තවද ජය ලබන්නෝ ඔවුන්මය.

وَمِنَ النَّاسِ مَنۡ يَّشۡتَرِىۡ لَهۡوَ الۡحَدِيۡثِ لِيُضِلَّ عَنۡ سَبِيۡلِ اللّٰهِ بِغَيۡرِ عِلۡمٍ ۖ وَّيَتَّخِذَهَا هُزُوًا ؕ اُولٰٓئِكَ لَهُمۡ عَذَابٌ مُّهِيۡنٌ ⑦

7. තවද දැනුමක් නොමැතිව අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) නොමගට යොමු කරනු පිණිසද, එය සරදමට ලක් කරනු පිණිසද නිෂ්ඵල කතාවන් (යහමග වෙනුවට) හුවමාරු කරන අයද මිනිසුන් අතර සිටියි. එවන් අයට නින්දිත දඬුවමක් ලැබෙනු ඇත.

وَاِذَا تُتۡلٰى عَلَيۡهِ اٰيٰتُنَا وَلّٰى مُسۡتَكۡبِرًا كَاَنۡ لَّمۡ يَسۡمَعۡهَا كَاَنَّ فِىۡۤ اُذُنَيۡهِ وَقۡرًا ۚ فَبَشِّرۡهُ بِعَذَابٍ اَلِيۡمٍ ⑧

8. තවද අපගේ වදන් ඔහුට පාරායනය කරනු ලැබූ විට, ඔහු ඒවා නොඇසුනාක් මෙන්ද ඔහුගේ කන් දෙකෙහි බිහිරිබවක් වූවාක් මෙන්ද ආඩම්බරව ඉවතට හැරෙයි. එබැවින් ඔහුට වේදනීය දඬුවමක් ගැන දැනුම් දෙන්න.

◆ මම අල්ලාහ් සියල්ල දන්නා වෙමි.

إِنَّ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَهُمْ جَنَّاتُ النَّعِيمِ ﴿٩﴾

9. නියතවශයෙන්ම විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නන් ගත්කල ඔවුන්හට සෞභාග්‍යයෙන් යුත් උද්‍යයානයන් ඇත.

خَالِدِينَ فِيهَا ۖ وَعْدَ اللَّهِ حَقًّا ۚ وَهُوَ الْعَزِيزُ الْحَكِيمُ ﴿١٠﴾

10. එහි ඔවුන් සදාකල් වෙසෙන්නෝය. අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය වේ. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

خَلَقَ السَّمَاوَاتِ بِغَيْرِ عَمَدٍ تَرَوْنَهَا ۖ وَأَلْقَىٰ فِي الْأَرْضِ رَوَاسِيَ أَن تَمِيدَ بِكُمْ وَبَثَّ فِيهَا مِن كُلِّ دَابَّةٍ ۚ وَأَنزَلْنَا مِنَ السَّمَاءِ مَاءً فَأَنبَتْنَا فِيهَا مِن كُلِّ زَوْجٍ كَرِيمٍ ﴿١١﴾

11. ඔහු කුළුණු නොමැතිව අහස් මවා ඇත්තේ නුඹලා ඒවා දැක ගැනීමටය. තවද ඔහු පොළොවෙහි නුඹලාව ප්‍රාණවත් කරනු පිණිස ස්ථිර කඳු ස්ථාපිත කර ඇත්තේය. තවද ඔහු එහි සියළු වර්ගයේ මැවීම් පතුරුවා ඇත්තේය. තවද අපි වළාකුළු වලින් ජලය පහළ කර, එහි සියළු උසස් වර්ගයක්ම වැඩෙන්නට සැලැස්වූයෙමු.

هَٰذَا خَلْقُ اللَّهِ فَأَرُونِي مَاذَا خَلَقَ الَّذِينَ مِن دُونِهِ ۚ بَلِ الظَّالِمُونَ فِي ضَلَالٍ مُّبِينٍ ﴿١٢﴾

12. මෙය අල්ලාහ්ගේ මැවීමයි. දැන් ඔහු හැර අන් අය මවා ඇත්තේ කුමක්දැයි මාහට පෙන්වනු. එහෙත් වරදකරුවන් ප්‍රකට නොමගෙහිය.

وَلَقَدْ آتَيْنَا لُقْمَانَ الْحِكْمَةَ أَنِ اشْكُرْ لِلَّهِ ۚ وَمَن يَشْكُرْ فَإِنَّمَا يَشْكُرُ لِنَفْسِهِ ۖ وَمَن كَفَرَ فَإِنَّ اللَّهَ غَنِيٌّ حَمِيدٌ ﴿١٣﴾

13. තවද 'අල්ලාහ්ට කෘතඥවන්නැ'යි (පවසමින්) අපි ලුක්මාන්ට ප්‍රඥාව පිරිනැමුවෙමු. තවද කවුරුන් හෝ කෘතඥවන්නේද (ඔහු) තම ආත්මය වෙනුවෙන්ම කෘතඥවන්නේය. තවද කවුරුන් හෝ අකෘතඥවන්නේද එවිට නියත වශයෙන්ම අල්ලාහ්, ස්වයං පෝෂිතය, ප්‍රසංශා හිමිය.

وَإِذْ قَالَ لُقْمَانُ لِابْنِهِ وَهُوَ يَعِظُهُ يَا بُنَيَّ لَا تُشْرِكْ بِاللَّهِ ۖ إِنَّ الشِّرْكَ لَظُلْمٌ عَظِيمٌ ﴿١٤﴾

14. තවද ලුක්මාන් තම පුතණුවන් වෙත ඔහුට අනුශාසනා කරමින් 'එම්බල මාගේ දයාබර පුතණුවනි! අල්ලාහ්ට සමානයන් නොතබන්න. නියතවශයෙන්ම (අල්ලාහ්ට) සමානයන් තැබීම බරපතල වරදක්යැ'යි කියූ කල්හි, (එම අවස්ථාව සිහිපත් කරන්න).

15. තවද අපි මිනිසාට ඔහුගේ දෙමාපියන් පිළිබඳව අණ කර ඇත්තෙමු. ඔහුගේ මව දුබලතාවය පිට දුබලතාවයෙන් යුතුව ඔහුව ඉසුලුවාය. තවද ඔහුගේ කිරි වැරීමට වසර දෙකක් ගත වන්නේය. 'මා හටද ඔබගේ දෙමාපියන් හටද ස්තුතිය පුද කරන්න. මා වෙතටම ආපසු පැමිණීම වේ'.

وَوَصَّيْنَا الْإِنْسَانَ بِوَالِدَيْهِ ۚ حَمَلَتْهُ أُمُّهُ
وَهْنًا عَلَىٰ وَهْنٍ وَفِصَالُهُ فِي عَامَيْنِ
أَنِ اشْكُرْ لِي وَلِوَالِدَيْكَ إِلَيَّ الْمَصِيرُ ﴿١٥﴾

16. 'තවද ඔබට දැනුමක් නොමැති දෙයක් මා හට සමාන තබන්නැයි ඔවුන් ඔබ සමග වාද කරන්නේ නම්, ඔවුනට අවනත නොවන්න. නමුත් (සියළු) ලෞකික කටයුතුවලදී ඔවුනට කාරුණික සහායයෙකු වන්න. තවද (අධ්‍යාත්මික කටයුතුවලදී) මා වෙත හැරෙන අයගේ මග අනුගමනය කරන්න. පසුව නුඹලාගේ ආපසු පැමිණීම මා වෙතටම වනු ඇත. තවද නුඹලා කරමින් සිටි දේ ගැන මම නුඹලාට දැනුම් දෙන්නෙමි'.

وَإِنْ جَاهَدَاكَ عَلَىٰ أَنْ تُشْرِكَ بِي مَا لَيْسَ
لَكَ بِهِ عِلْمٌ فَلَا تُطِعْهُمَا وَصَاحِبْهُمَا
فِي الدُّنْيَا مَعْرُوفًا وَاتَّبِعْ سَبِيلَ مَنْ
أَنَابَ إِلَيَّ ۚ ثُمَّ إِلَيَّ مَرْجِعُكُمْ
فَأُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ تَعْمَلُونَ ﴿١٦﴾

17. 'මාගේ දයාබර පුතණුවනි! යමක් අබ ඇටයක තරම් බරක් වුවද තවද එය පර්වතයක් තුල වුවද නැතහොත් අහස්හිද නැතහොත් පොළොවෙහිද වුවද නියතවශයෙන්ම අල්ලාහ් එය (පිටතට) ගෙන එන්නේමය. සැබැවින්ම අල්ලාහ් ඉතා සියුම්දේ දත්තාය, සියල්ල විමසිලිමත්ය'.

يَا بُنَيَّ إِنَّهَا إِنْ تَكُ مِثْقَالَ حَبَّةٍ
مِنْ خَرْدَلٍ فَتَكُنْ فِي صَخْرَةٍ أَوْ فِي
السَّمَاوَاتِ أَوْ فِي الْأَرْضِ يَأْتِ بِهَا اللَّهُ ۚ
إِنَّ اللَّهَ لَطِيفٌ خَبِيرٌ ﴿١٧﴾

18. 'මාගේ දයාබර පුතණුවනි! නමස්කාරයෙහි නිරතවන්න. තවද යහපත අණ කරන්න. තවද නපුර තහනම් කරන්න. තවද ඔබට කුමක් අත්වුවද ඉවසීමෙන් දරා සිටින්න. නියතවශයෙන්ම මෙය අධිෂ්ඨාන පූර්ව කාර්යයන් අතර වේ'.

يَا بُنَيَّ أَقِمِ الصَّلَاةَ وَأْمُرْ بِالْمَعْرُوفِ
وَانْهَ عَنِ الْمُنْكَرِ وَاصْبِرْ عَلَىٰ مَا
أَصَابَكَ ۖ إِنَّ ذَٰلِكَ مِنْ عَزْمِ الْأُمُورِ ﴿١٨﴾

19. 'තවද ඔබගේ කම්මුල ආඩම්බරයෙන් යුතුව මිනිසුන්ගෙන් ඉවත නොහරවන්න. පොළොවෙහි උඩඟු ලෙස නොඇවිදින්න.

وَلَا تُصَعِّرْ خَدَّكَ لِلنَّاسِ وَلَا تَمْشِ
فِي الْأَرْضِ مَرَحًا ۖ إِنَّ اللَّهَ لَا يُحِبُّ

كُلَّ مُخْتَالٍ فَخُورٍ ﴿١٩﴾

නියතවශයෙන්ම අහංකාරව පුරසාරම් දොඩන්නන්ව අල්ලාහ් ප්‍රිය නොකරයි'.

وَاقْصِدْ فِي مَشْيِكَ وَاغْضُضْ مِن صَوْتِكَ ۚ إِنَّ أَنكَرَ الْأَصْوَاتِ لَصَوْتُ الْحَمِيرِ ﴿٢٠﴾

20. 'තවද ඔබ මධ්‍යස්ථ වේගයෙන් ඇවිදින්න. තවද ඔබගේ කටහඬ පහත්ව තබාගන්න. සැබැවින්ම ඉතාමත් පිළිකුල් කටහඬ, බූරුවාගේ කටහඬය'.

أَلَمْ تَرَوْا أَنَّ اللَّهَ سَخَّرَ لَكُم مَّا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ وَأَسْبَغَ عَلَيْكُمْ نِعَمَهُ ظَاهِرَةً وَبَاطِنَةً ۗ وَمِنَ النَّاسِ مَن يُجَادِلُ فِي اللَّهِ بِغَيْرِ عِلْمٍ وَلَا هُدًى وَلَا كِتَابٍ مُّنِيرٍ ﴿٢١﴾

21. අල්ලාහ් අහස්හි ඇති සියලු දේ මෙන්ම පොළොවෙහි ඇති සියලු දේ නුඹලා වෙනුවෙන් සේවය සඳහා යොදවා, නුඹලා කෙරෙහි ඔහුගේ අනුග්‍රහයන් බාහිරවද අභ්‍යන්තරවද පරිපූර්ණ කළ සැටි නුඹලා දැක නොතිබේද? තවද අල්ලාහ් සම්බන්ධව කිසිදු දැනුමක් නොමැතිවද කිසිදු මගපෙන්වීමක් නොමැතිවද දීප්තිමත් පුස්තකයක් නොමැතිවද වාද කරන අය මිනිසුන් අතර වෙති.

وَإِذَا قِيلَ لَهُمُ اتَّبِعُوا مَا أَنزَلَ اللَّهُ قَالُوا بَلْ نَتَّبِعُ مَا وَجَدْنَا عَلَيْهِ آبَاءَنَا ۚ أَوَلَوْ كَانَ الشَّيْطَانُ يَدْعُوهُمْ إِلَىٰ عَذَابِ السَّعِيرِ ﴿٢٢﴾

22. තවද 'අල්ලාහ් පහළ කර ඇති දේ අනුගමනය කරනු'යි ඔවුනට කියනු ලබන විට, ඔවුන්, 'නොඑසේය, අපගේ පියවරුන් අනුගමනය කළ කුමන දේ අප දුටුවේද එයම අපි අනුගමනය කරන්නෙමු'යි කියති. කිමද! ෂෙයිතාන් ඔවුන්ව දැල්වෙන ගින්නේ දඬුවම කරා කැඳවා සිටිය වුවද?

وَمَن يُسْلِمْ وَجْهَهُ إِلَى اللَّهِ وَهُوَ مُحْسِنٌ فَقَدِ اسْتَمْسَكَ بِالْعُرْوَةِ الْوُثْقَىٰ ۗ وَإِلَى اللَّهِ عَاقِبَةُ الْأُمُورِ ﴿٢٣﴾

23. තවද යමෙක් තමාව (මුළුමනින්ම) අල්ලාහ්ට අවනත කරමින් යහකම් කරන්නෙක් වන්නේද, නියත වශයෙන්ම ඔහු ශක්තිමත් මිටක් දැඩිව ග්‍රහණය කර ගත්තේය. තවද සියළු කටයුතුවල අවසානය අල්ලාහ් වෙතය.

وَمَن كَفَرَ فَلَا يَحْزُنكَ كُفْرُهُ ۚ إِلَيْنَا مَرْجِعُهُمْ فَنُنَبِّئُهُم بِمَا عَمِلُوا ۚ إِنَّ اللَّهَ

24. තවද යමෙක් අවිශ්වාස කරන්නේද, ඔහුගේ අවිශ්වාසය ඔබව කනස්සල්ලට පත් නොකරත්වා! අප වෙතටම ඔවුන්ගේ ආපසු පැමිණීම

වේ. පසුව ඔවුන් කළ දේ අපි ඔවුනට පවසන්නෙමු. නියතවශයෙන්ම අල්ලාහ් සිත්හි ඇති දේ ඉතා මැනැවින් දන්නේය.

عَلِيْمٌۢ بِذَاتِ الصُّدُوْرِ ﴿٢٤﴾

25. අපි ඔවුනට මදක් විනෝදවන්නට හරින්නෙමු. පසුව අපි ඔවුන්ව බරපතල වේදනාව වෙත ඇදගෙන යන්නෙමු.

نُمَتِّعُهُمْ قَلِيْلًا ثُمَّ نَضْطَرُّهُمْ اِلٰى عَذَابٍ غَلِيْظٍ ﴿٢٥﴾

26. තවද 'අහස් සහ පොළොව මවා ඇත්තේ කවුරුන්ද?'යි ඔබ ඔවුන්ගෙන් ඇසුවහොත්, ඔවුන් 'අල්ලාහ්යැ'යි නියතවශයෙන්ම පිළිතුරු දෙන්නෝය. පවසන්න, 'සියළු ප්‍රසංශා අල්ලාහ්ට හිමිය' නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

وَلَئِنْ سَاَلْتَهُمْ مَّنْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ لَيَقُوْلُنَّ اللّٰهُ ؕ قُلِ الْحَمْدُ لِلّٰهِ ؕ بَلْ اَكْثَرُهُمْ لَا يَعْلَمُوْنَ ﴿٢٦﴾

27. අහස් මෙන්ම පොළොවෙහි ඇති සියල්ල අල්ලාහ්ටම අයත්ය. සැබැවින්ම අල්ලාහ් ස්වයං පෝෂිතය, ප්‍රශංසා හිමිය.

لِلّٰهِ مَا فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ اِنَّ اللّٰهَ هُوَ الْغَنِىُّ الْحَمِيْدُ ﴿٢٧﴾

28. තවද පොළොවෙහි ඇති සියළුම ගස්, පෑන් බවට පත්වී තවද සාගරය (තීන්ත බවට පත්වී), එයට පසු තවත් සාගර සතක් එයට එක් වුවද, අල්ලාහ්ගේ වදන් නිමා නොවනු ඇත. නියතවශයෙන්ම අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَلَوْ اَنَّ مَا فِى الْاَرْضِ مِنْ شَجَرَةٍ اَقْلَامٌ وَّالْبَحْرُ يَمُدُّهٗ مِنْۢ بَعْدِهٖ سَبْعَةُ اَبْحُرٍ مَّا نَفِدَتْ كَلِمٰتُ اللّٰهِ ؕ اِنَّ اللّٰهَ عَزِيْزٌ حَكِيْمٌ ﴿٢٨﴾

29. නුඹලාව මැවීමද නුඹලාව නැවත නැගිටුවීමද එක් ජීවියෙකු(ව මැවීම සහ නැවත නැගිටුවීම) බඳුය. සැබැවින්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

مَا خَلْقُكُمْ وَلَا بَعْثُكُمْ اِلَّا كَنَفْسٍ وَّاحِدَةٍ ؕ اِنَّ اللّٰهَ سَمِيْعٌۢ بَصِيْرٌ ﴿٢٩﴾

30. අල්ලාහ් රාත්‍රිය දවාලෙහි ඇතුළු කර තවද දවාල රාත්‍රියෙහි ඇතුළු කර තවද ඔහු ඉර සහ සඳ සේවය සඳහා යොදවා මේ සෑම එකක්ම නියමිත කාලය තෙක් සිය (පථයේ) ගමන් කරන බවත් අල්ලාහ් නුඹලා

اَلَمْ تَرَ اَنَّ اللّٰهَ يُوْلِجُ الَّيْلَ فِى النَّهَارِ وَيُوْلِجُ النَّهَارَ فِى الَّيْلِ وَسَخَّرَ الشَّمْسَ وَالْقَمَرَ ۫ كُلٌّ يَّجْرِىْۤ اِلٰٓى اَجَلٍ مُّسَمًّى

وَّاَنَّ اللّٰهَ بِمَا تَعۡمَلُوۡنَ خَبِيۡرٌ ﴿۳۰﴾

කරන දේ ගැන විමසිලිමත් බවත් ඔබ දැක නොතිබේද?

ذٰلِكَ بِاَنَّ اللّٰهَ هُوَ الۡحَقُّ وَاَنَّ مَا يَدۡعُوۡنَ مِنۡ دُوۡنِهِ الۡبَاطِلُ ۙ وَاَنَّ اللّٰهَ هُوَ الۡعَلِىُّ الۡكَبِيۡرُ ﴿۳۱﴾ ع

31. එය මන්ද යත්, සත්‍ය වූ (දෙවියන්) වන්නේ අල්ලාහ් පමණි. තවද ඔවුන් ඔහු හැර කැඳවන සියල්ල අසත්‍ය වන බැවිනි. තවද අත්‍යුත්කෘෂ්ට වන්නේද අති ශ්‍රේෂ්ඨ වන්නේද අල්ලාහ් (පමණක්ම) වන බැවිනි.

اَلَمۡ تَرَ اَنَّ الۡفُلۡكَ تَجۡرِىۡ فِى الۡبَحۡرِ بِنِعۡمَتِ اللّٰهِ لِيُرِيَكُمۡ مِّنۡ اٰيٰتِهٖ ؕ اِنَّ فِىۡ ذٰلِكَ لَاٰيٰتٍ لِّـكُلِّ صَبَّارٍ شَكُوۡرٍ ﴿۳۲﴾

32. අල්ලාහ්ගේ අනුග්‍රහයෙන් නැව් මුහුදෙහි ගමන් කරනු ඔබ නොදකින්නෙහිද? (එය) ඔහුගේ සළකුණු ඔහු නුඹලාට පෙන්වනු පිණිසය. නියතවශයෙන්ම මෙහි ඉවසිලිවන්තවන සහ කෘතඥවන සෑම අයටම සළකුණු ඇත.

وَاِذَا غَشِيَهُمۡ مَّوۡجٌ كَالظُّلَلِ دَعَوُا اللّٰهَ مُخۡلِصِيۡنَ لَـهُ الدِّيۡنَ ۚ فَلَمَّا نَجّٰٮهُمۡ اِلَى الۡبَـرِّ فَمِنۡهُمۡ مُّقۡتَصِدٌ ؕ وَمَا يَجۡحَدُ بِاٰيٰتِنَاۤ اِلَّا كُلُّ خَتَّارٍ كَفُوۡرٍ ﴿۳۳﴾

33. තවද රළ සෙවනැලි මෙන් ඔවුන්ව වෙලාගනිත්දී, ඔවුන් අල්ලාහ්ව ඔහුට අවංක විශ්වාසයෙන් යුතුව කැඳවන්නෝය. නමුත් ඔහු ඔවුන්ව ආරක්ෂිතව ගොඩබිමට ගෙන ආ විට, ඔවුන්ගෙන් සමහර අය මධ්‍යස්ථ මාර්ගය පිළිපදින්නෝය. තවද සියලු විශ්වාස ද්‍රෝහී මෙන්ම අකෘතඥ(අය) මිස අන්අය අපගේ සළකුණු ප්‍රතික්ෂේප නොකරන්නෝය.

يٰۤاَيُّهَا النَّاسُ اتَّقُوۡا رَبَّكُمۡ وَاخۡشَوۡا يَوۡمًا لَّا يَجۡزِىۡ وَالِدٌ عَنۡ وَّلَدِهٖ وَلَا مَوۡلُوۡدٌ هُوَ جَازٍ عَنۡ وَّالِدِهٖ شَيۡـئًا ؕ اِنَّ وَعۡدَ اللّٰهِ حَقٌّ فَلَا تَغُرَّنَّكُمُ الۡحَيٰوةُ الدُّنۡيَا ۖ وَلَا يَغُرَّنَّكُمۡ بِاللّٰهِ الۡغَرُوۡرُ ﴿۳۴﴾

34. එම්බල මිනිසුනි! නුඹලාගේ අධිපතියාණන්ට බිය බැතිමත් වනු. තවද පියෙකු තම පුතුට (කිසිදු) ඵලක් නොවන්නාවූද පුතෙකු තම පියාට කිසිසේත්ම කිසිදු ඵලක් නොවන්නා වූද දිනයට බිය වනු. අල්ලාහ්ගේ පොරොන්දුව නියතවශයෙන්ම සත්‍යයකි. එබැවින් මෙලොව ජිවිතය නුඹලාව මුලා නොකරත්වා. තවද මුලා කරන්නා අල්ලාහ් සම්බන්ධව නුඹලාව මුලාවට පත් නොකරත්වා.

اِنَّ اللّٰهَ عِنۡدَهٗ عِلۡمُ السَّاعَةِ ۚ وَيُنَزِّلُ الۡغَيۡثَ ۚ وَيَعۡلَمُ مَا فِى الۡاَرۡحَامِ ؕ

35. සැබැවින්ම (අවසන්) හෝරාවේ දැනුම අල්ලාහ් වෙතමය. තවද ඔහු වර්ෂාව පහළ කරන්නේය. තවද ඔහු ගැබ්තුල ඇති දේ දන්නේය. තවද

وَمَا تَدْرِي نَفْسٌ مَّاذَا تَكْسِبُ غَدًا ۖ وَمَا تَدْرِي نَفْسٌ بِأَيِّ أَرْضٍ تَمُوتُ ۚ إِنَّ اللَّهَ عَلِيمٌ خَبِيرٌ ﴿٣٥﴾

කිසිදු ආත්මයක්, එය හෙට උපයන්නේ කුමක්දැයි නොදනියි. තවද කිසිදු ආත්මයක්, එය කුමන භූමියෙහි මරණයට පත්වන්නේදැයි නොදනියි. නියතවශයෙන්ම අල්ලාහ්, සියල්ල දන්නාය, සියල්ල විමසිලිමත්ය.




සජදහ්
(මක්කාහිදි පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

الٓمّٓ ②

2. අලිෆ්, ලාම්, මීම්. ◆

تَنْزِيْلُ الْكِتٰبِ لَا رَيْبَ فِيْهِ مِنْ رَّبِّ الْعٰلَمِيْنَ ③

3. මෙම ග්‍රන්ථයේ පහළවීම සර්ව ලෝකයන්ගේ අධිපතියාණන්ගෙන්ය. මෙය පිළිබඳව කිසිදු සැකයක් නැත.

اَمْ يَقُوْلُوْنَ افْتَرٰىهُ ۚ بَلْ هُوَ الْحَقُّ مِنْ رَّبِّكَ لِتُنْذِرَ قَوْمًا مَّآ اَتٰىهُمْ مِّنْ نَّذِيْرٍ مِّنْ قَبْلِكَ لَعَلَّهُمْ يَهْتَدُوْنَ ④

4. 'ඔහු මෙය ගෙතුවේයැ'යි ඔවුහු කියන්නෝද? නොඑසේය, මෙය ඔබගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යයකි. (මෙය) ඔබට පෙර අවවාද කරන්නෙකු තමන් වෙත නොපැමිණි ජනතාවකට ඔබ අවවාද කරනු පිණිසද ඇතැම්විට ඔවුන් යහමග අනුගමනය කරනු පිණිසද වේ.

اَللّٰهُ الَّذِيْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ وَمَا بَيْنَهُمَا فِيْ سِتَّةِ اَيَّامٍ ثُمَّ اسْتَوٰى عَلَى الْعَرْشِ ۗ مَا لَكُمْ مِّنْ دُوْنِهٖ مِنْ وَّلِيٍّ وَّلَا شَفِيْعٍ ۗ اَفَلَا تَتَذَكَّرُوْنَ ⑤

5. අහස් සහ පොළොවද ඒ දෙක අතර ඇති සියල්ලද කාල පරිච්ඡේද හයකින් මැව්වේ අල්ලාහ්මය. පසුව ඔහු සිංහාසනයේ ස්ථාපිත විය. ඔහු හැරෙන්නට නුඹලාට කිසිදු මිතුරෙකු හෝ මැදිහත්වන්නෙකු නොමැත. එසේ නම් නුඹලා වටහා නොගන්නෙහුද?

يُدَبِّرُ الْاَمْرَ مِنَ السَّمَآءِ اِلَى الْاَرْضِ ثُمَّ يَعْرُجُ اِلَيْهِ فِيْ يَوْمٍ كَانَ مِقْدَارُهٗٓ اَلْفَ سَنَةٍ مِّمَّا تَعُدُّوْنَ ⑥

*6. ඔහු අහස්හි සිට පොළොව දක්වා (තම) නියමය සැලසුම් කරන්නේය. පසුව එය ඔහු වෙත එක් දිනක ආපසු යනු ඇත. එය නුඹලාගේ ගණන් ගැනීම අනුව වසර දහසකට සමානය.

---

◆ මම අල්ලාහ් සියල්ල දත්තා වෙමි.

*සටහන. 6: මෙහි සඳහන් වන්නේ මුස්ලිම්වරුන් වසර දහසක් දක්වා බෙලහීන තත්ත්වයට පත්වන බවත් ඉන්පසු නබි මුහම්මද් (සල්) තුමාණන්ගේ අනාවැකිය අනුව ඉස්ලාමය පුනරුත්ථාපනය කිරීම සඳහා දූතයෙකු ලෙස ඉමාම් මහ්දි (අලෛ) තුමා පැමිණෙන බවත්ය.

7. අදෘෂ්‍යමාන දේ මෙන්ම දෘෂ්‍යමාන දේ දන්නා ඔහුය. (ඔහු) බලසම්පන්නය, පරමදයාබරය.

ذٰلِكَ عٰلِمُ الْغَيْبِ وَالشَّهَادَةِ الْعَزِيْزُ الرَّحِيْمُ ۙ﴿٧﴾

8. තමා මවා ඇති සියල්ල මැනැවින් සම්පූර්ණ කළේ ඔහුමය. තවද ඔහු මිනිසාගේ මැවීම මැටි පසින් ආරම්භ කළේය.

الَّذِيْٓ اَحْسَنَ كُلَّ شَيْءٍ خَلَقَهٗ وَبَدَاَ خَلْقَ الْاِنْسَانِ مِنْ طِيْنٍ ۚ﴿٨﴾

9. පසුව ඔහුගේ පරපුර තුච්ඡ වූ දියරයක සාරයෙන් ඔහු ඇති කළේය.

ثُمَّ جَعَلَ نَسْلَهٗ مِنْ سُلٰلَةٍ مِّنْ مَّآءٍ مَّهِيْنٍ ۚ﴿٩﴾

*10. පසුව ඔහු ඔහුව(මිනිසාව) හැඩ ගස්වා තම ආත්මය ඔහු තුළට පිඹුවේය. තවද, ඔහු නුඹලාට කන්ද ඇස්ද හදවත්ද දුන්නේය. (නමුත්) නුඹලා කෘතඥතාවය දක්වන්නේ ස්වල්පයක්ය!

ثُمَّ سَوّٰىهُ وَنَفَخَ فِيْهِ مِنْ رُّوْحِهٖ وَجَعَلَ لَكُمُ السَّمْعَ وَالْاَبْصَارَ وَالْاَفْـِٕدَةَ ۗ قَلِيْلًا مَّا تَشْكُرُوْنَ ﴿١٠﴾

11. තවද ඔවුන්, 'කිමද! අප පොළොවෙහි නැති වූවායින් පසුව අපි නව මැවීමක් වන්නෙමුදැ?'යි කියති. නොඑසේය, නමුත් ඔවුන් තමන්ගේ අධිපතියාණන් හමුවීම පිළිබඳව අවිශ්වාස කරන්නන් වෙති.

وَقَالُوْٓا ءَاِذَا ضَلَلْنَا فِي الْاَرْضِ ءَاِنَّا لَفِيْ خَلْقٍ جَدِيْدٍ ؕ بَلْ هُمْ بِلِقَآئِ رَبِّهِمْ كٰفِرُوْنَ ﴿١١﴾

12. පවසන්න, 'නුඹලා වෙනුවෙන් පත්කරනු ලැබූ මරණය සම්බන්ධ සුරදූතයා නුඹලාව මරණයට පත් කරන්නේය. පසුව නුඹලා ගෙන එනු ලබන්නේ, නුඹලාගේ අධිපතියාණන් වෙතටමය'.

قُلْ يَتَوَفّٰىكُمْ مَّلَكُ الْمَوْتِ الَّذِيْ وُكِّلَ بِكُمْ ثُمَّ اِلٰى رَبِّكُمْ تُرْجَعُوْنَ ﴿١٢﴾

13. වරදකරුවන් ඔවුන්ගේ හිස් ඔවුන්ගේ අධිපතියාණන් ඉදිරියෙහි පහතට හෙලමින්, 'අපගේ අධිපතියාණෙනි! අපි දැක ගත්තෙමු. තවද අපි සවන් දුන්නෙමු. එබැවින් අප යහපත් ක්‍රියාවන් කරනු පිණිස අපව ආපසු යවනු මැනව. දැන් අපි

وَلَوْ تَرٰٓى اِذِ الْمُجْرِمُوْنَ نَاكِسُوْا رُءُوْسِهِمْ عِنْدَ رَبِّهِمْ ۗ رَبَّنَآ اَبْصَرْنَا وَسَمِعْنَا فَارْجِعْنَا نَعْمَلْ صَالِحًا اِنَّا

*සටහන. 10: 'ෆුආද්' යන වචනය අල් කුර්ආනයේ භාවිතා කෙරෙන ආකාරයට එහි අරුත හදවත පමණක් නොවන අතර වටහා ගැනීමේ උපරිම ශක්තියද එයින් අදහස් වේ. මේ සඳහා 28.11 (අල්-කසස්) 53.12 (අල්-නජ්ම්) 46.27 (අල්-අහ්කාෆ්) සහ 14.38 (ඉබ්රාහීම්) යන වාක්‍යයන් බලන්න.

ස්ථිරව විශ්වාස කරන්නන් වෙමු'යි (ඔවුන් කියන අයුරු) ඔබ දකින්නේ නම්.

مُوقِنُونَ ﴿١٣﴾

14. තවද අප අපගේ අභිමතය (ක්‍රියාත්මක) කළේ නම්, අපට සෑම ආත්මයකටම යහමග ලබා දෙන්නට තිබුණි. නමුත් 'මම ජින්වරුන්වද මිනිසුන්වද සියල්ලන්ගෙන් නිරය පුරවන්නෙමි' යන වදන මාගෙන් සැබෑ විය.

وَلَوْ شِئْنَا لَآتَيْنَا كُلَّ نَفْسٍ هُدَاهَا وَلَٰكِنْ حَقَّ الْقَوْلُ مِنِّي لَأَمْلَأَنَّ جَهَنَّمَ مِنَ الْجِنَّةِ وَالنَّاسِ أَجْمَعِينَ ﴿١٤﴾

15. එමනිසා නුඹලාගේ මෙම දිනයේ හමුවීම නුඹලා අමතක කළ බැවින් නුඹලා (නුඹලාගේ ක්‍රියාවන්හි දඬුවම) අත් විඳිනු. අපි(ද) නුඹලාව අමතක කළෙමු. තවද නුඹලා කරමින් සිටි දේ නිසා දීර්ඝවූ දඬුවම නුඹලා අත් විඳිනු.

فَذُوقُوا بِمَا نَسِيتُمْ لِقَاءَ يَوْمِكُمْ هَٰذَا إِنَّا نَسِينَاكُمْ وَذُوقُوا عَذَابَ الْخُلْدِ بِمَا كُنْتُمْ تَعْمَلُونَ ﴿١٥﴾

16. අපගේ සළකුණු කෙරෙහි විශ්වාස කරන අය වන්නේ ඔවුනට ඒ ගැන මතක් කර දුන් විට, නළල බිම තබා නමස්කාරය කරමින් (දෙවියන් ඉදිරියෙහි) වැටී තම අධිපතියාණන්ගේ ප්‍රශංසාව සුවිශුද්ධ කරන්නන්ය. තවද ඔවුහු අහංකාර නොවෙති.

إِنَّمَا يُؤْمِنُ بِآيَاتِنَا الَّذِينَ إِذَا ذُكِّرُوا بِهَا خَرُّوا سُجَّدًا وَسَبَّحُوا بِحَمْدِ رَبِّهِمْ وَهُمْ لَا يَسْتَكْبِرُونَ ۩ ﴿١٦﴾

17. ඔවුන්ගේ ඇලපත යහන්වලින් ඉවත් කර ගනු ඇත. (තවද) ඔවුන් බියෙන් සහ අපේක්ෂාවෙන් ඔවුන්ගේ අධිපතියාණන්ව කැඳවන්නෝය. තවද අප ඔවුනට පිරිනැමූ දෙයින් ඔවුන් වියදම් කරන්නෝය.

تَتَجَافَىٰ جُنُوبُهُمْ عَنِ الْمَضَاجِعِ يَدْعُونَ رَبَّهُمْ خَوْفًا وَطَمَعًا وَمِمَّا رَزَقْنَاهُمْ يُنْفِقُونَ ﴿١٧﴾

18. තවද ඔවුන්ගේ යහපත් ක්‍රියාවන් සඳහා තිළිණයක් ලෙස ඔවුන් වෙනුවෙන් නෙත්වලට සිසිලස ගෙන දෙන දේ කෙතරම් සඟවා තබා ඇත්තේදැයි කිසිදු ආත්මයක් නොදන්නේය.

فَلَا تَعْلَمُ نَفْسٌ مَا أُخْفِيَ لَهُمْ مِنْ قُرَّةِ أَعْيُنٍ جَزَاءً بِمَا كَانُوا يَعْمَلُونَ ﴿١٨﴾

19. එසේනම්, විශ්වාස කරන තැනැත්තා අවනත නොවන තැනැත්තා මෙන් විය හැකිද? ඔවුහු එක සමාන නොවෙති.

أَفَمَنْ كَانَ مُؤْمِنًا كَمَنْ كَانَ فَاسِقًا ۚ لَا يَسْتَوُونَ ﴿١٩﴾

20. විශ්වාස කොට යහපත් ක්‍රියා කළ අය ගත් කළ, ඔවුන් කරමින් සිටි දේ වෙනුවෙන් ආගන්තුක සත්කාරයක් වශයෙන් සදාතනික වාසස්ථානයේ උද්‍යානයන් ඔවුනට ලැබෙනු ඇත.

اَمَّا الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ فَلَهُمۡ جَنّٰتُ الۡمَاۡوٰى نُزُلًاۢ بِمَا كَانُوۡا يَعۡمَلُوۡنَ ٢٠

21. අවනත නොවන්නන් ගත් කළ, ඔවුන්ගේ වාසස්ථානය (නිරා)ගින්න වනු ඇත. ඔවුන්, එයින් පිටවන්නට කැමතිවන සෑම විටම, ඔවුන් ඒවෙතටම හරවනු ලබන්නෝය. 'නුඹලා ප්‍රතික්ෂේප කරමින් සිටි ගින්නේ දඬුවම විඳිනු'යි ඔවුනට කියනු ලබන්නේය.

وَاَمَّا الَّذِيۡنَ فَسَقُوۡا فَمَاۡوٰٮهُمُ النَّارُ ؕ كُلَّمَاۤ اَرَادُوۡۤا اَنۡ يَّخۡرُجُوۡا مِنۡهَاۤ اُعِيۡدُوۡا فِيۡهَا وَقِيۡلَ لَهُمۡ ذُوۡقُوۡا عَذَابَ النَّارِ الَّذِىۡ كُنۡتُمۡ بِهٖ تُكَذِّبُوۡنَ ٢١

22. තවද ඔවුන් (පසුතැවිලිවී අප වෙත) ආපසු හැරෙනු පිණිස, නියතවශයෙන්ම අපි ඔවුනට මහත් දඬුවමට පෙර සුළු දඬුවමක් විඳින්නට සලස්වන්නෙමු.

وَلَـنُذِيۡقَنَّهُمۡ مِّنَ الۡعَذَابِ الۡاَدۡنٰى دُوۡنَ الۡعَذَابِ الۡاَكۡبَرِ لَعَلَّهُمۡ يَرۡجِعُوۡنَ ٢٢

23. තම අධිපතියාණන්ගේ සළකුණු කෙනෙකුට සිහිකරවනු ලැබුවායින් පසුවද, ඒවායින් ඉවත හැරෙන්නාට වඩා අදමිටුවා වන්නේ කවරෙක්ද? අපි නියතවශයෙන්ම වරද කරුවන්ගෙන් පළිගන්නන් වන්නෙමු.

وَمَنۡ اَظۡلَمُ مِمَّنۡ ذُكِّرَ بِاٰيٰتِ رَبِّهٖ ثُمَّ اَعۡرَضَ عَنۡهَا ؕ اِنَّا مِنَ الۡمُجۡرِمِيۡنَ مُنۡتَقِمُوۡنَ ٢٣ ع

24. තවද අපි මූසාටද පුස්තකය දුන්නෙමු. එබැවින් ඔබද එය (පරිපූර්ණ ග්‍රන්ථය)හා හමුව පිළිබඳව සැකයෙහි නොවන්න. තවද අපි එය ඉස්රාඊලයේ දරුවන් හට මග පෙන්වීමක් කළෙමු.

وَلَقَدۡ اٰتَيۡنَا مُوۡسَى الۡكِتٰبَ فَلَا تَكُنۡ فِىۡ مِرۡيَةٍ مِّنۡ لِّقَآٮِٕهٖ وَجَعَلۡنٰهُ هُدًى لِّبَنِىۡۤ اِسۡرَآءِيۡلَ ۚ ٢٤

25. තවද ඔවුන් ස්ථිරසාර වූ විට අපි ඔවුන් අතරින් අපගේ විධානයෙන් (ජනතාවට) මග පෙන්වූ නායකයින් පත් කළෙමු. තවද ඔවුන් අපගේ සළකුණු කෙරෙහි දැඩිව විශ්වාස කරන්නන් වූහ.

وَجَعَلۡنَا مِنۡهُمۡ اَٮِٕمَّةً يَّهۡدُوۡنَ بِاَمۡرِنَا لَمَّا صَبَرُوۡا ؕ وَكَانُوۡا بِاٰيٰتِنَا يُوۡقِنُوۡنَ ٢٥

إِنَّ رَبَّكَ هُوَ يَفْصِلُ بَيْنَهُمْ يَوْمَ الْقِيَامَةِ فِيمَا كَانُوا فِيهِ يَخْتَلِفُونَ ﴿٢٦﴾

26. සැබැවින්ම ඔබගේ අධිපතියාණන්, ඔහු ඔවුන් එකඟ නොවූ දේ පිළිබඳව පුනරුත්ථාන දිනයේදී ඔවුන් අතර විනිශ්චය කරන්නේය.

أَوَلَمْ يَهْدِ لَهُمْ كَمْ أَهْلَكْنَا مِن قَبْلِهِم مِّنَ الْقُرُونِ يَمْشُونَ فِي مَسَاكِنِهِمْ ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ ۖ أَفَلَا يَسْمَعُونَ ﴿٢٧﴾

27. අපි ඔවුනට පෙර කොපමණ පරම්පරාවන් විනාශ කළෙමුද? එය ඔවුනට මග පෙන්වීමක් නොවූයේද? ඔවුන් (දැන්) එවැන්නන්ගේ වාසස්ථානයන්හි සැරිසරති. එහි නියතවශයෙන්ම සළකුණු ඇත. එසේනම් ඔවුන් සවන් නොදෙන්නෝද?

أَوَلَمْ يَرَوْا أَنَّا نَسُوقُ الْمَاءَ إِلَى الْأَرْضِ الْجُرُزِ فَنُخْرِجُ بِهِ زَرْعًا تَأْكُلُ مِنْهُ أَنْعَامُهُمْ وَأَنفُسُهُمْ ۖ أَفَلَا يُبْصِرُونَ ﴿٢٨﴾

28. අප වියළි පොළොවට ජලය ගලා යන්නට සලස්වා එමගින් ඔවුන්ගේ ගවසතුන්ද ඔවුන්ද අනුභව කරන්නාවූ භෝග හටගන්වන සැටි ඔවුන් දැක නොතිබේද? එසේ තිබියදීත් ඔවුන් නොදකින්නෝද?

وَيَقُولُونَ مَتَىٰ هَٰذَا الْفَتْحُ إِن كُنتُمْ صَادِقِينَ ﴿٢٩﴾

29. තවද, 'නුඹලා සත්‍යවාදීන් නම් මෙම ජයග්‍රහණය පැමිණෙන්නේ කවදාදැ?'යි ඔවුන් අසති.

قُلْ يَوْمَ الْفَتْحِ لَا يَنفَعُ الَّذِينَ كَفَرُوا إِيمَانُهُمْ وَلَا هُمْ يُنظَرُونَ ﴿٣٠﴾

30. පවසන්න, 'එම ජයග්‍රහණ දිනයේදී අවිශ්වාසිතයින්ගේ විශ්වාසය ඔවුනට කිසිදු ඵලක් ගෙන නොදෙන්නේය. තවද ඔවුන්ට කාල අවකාශය දෙනු නොලබන්නේය'.

فَأَعْرِضْ عَنْهُمْ وَانتَظِرْ إِنَّهُم مُّنتَظِرُونَ ﴿٣١﴾

31. එබැවින්, ඔවුන්ව පිටුපා හරින්න. තවද බලාසිටින්න. නියතවශයෙන් ඔවුන්ද බලාසිටින්නන්ය.




අල් අහ්zසාබ්
(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا النَّبِىُّ اتَّقِ اللّٰهَ وَلَا تُطِعِ الْكٰفِرِيْنَ وَالْمُنٰفِقِيْنَ ؕ اِنَّ اللّٰهَ كَانَ عَلِيْمًا حَكِيْمًا ۙ②

2. එම්බල වක්තෘවරයාණෙනි! අල්ලාහ්ගෙන් ආරක්ෂාව පතන්න. තවද අවිශ්වාසිතයින් සහ කුහකයින් (ගේ සිතැඟියාවන්) අනුගමනය නොකරන්න. සැබැවින්ම අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

وَّاتَّبِعْ مَا يُوْحٰۤى اِلَيْكَ مِنْ رَّبِّكَ ؕ اِنَّ اللّٰهَ كَانَ بِمَا تَعْمَلُوْنَ خَبِيْرًا ۙ③

3. තවද ඔබගේ අධිපතියාණන්ගෙන් අනාවරණය කරනු ලබන දේ අනුගමනය කරන්න. සැබැවින්ම අල්ලාහ් නුඹලා කරන දේ ගැන ඉතා විමසිලිමත්ය.

وَّتَوَكَّلْ عَلَى اللّٰهِ ؕ وَكَفٰى بِاللّٰهِ وَكِيْلًا ④

4. තවද අල්ලාහ් කෙරෙහි ඔබගේ විශ්වාසය තබන්න. තවද අල්ලාහ් ආරක්ෂකයෙකු වශයෙන් ප්‍රමාණවත්ය.

مَا جَعَلَ اللّٰهُ لِرَجُلٍ مِّنْ قَلْبَيْنِ فِىْ جَوْفِهٖ ۚ وَمَا جَعَلَ اَزْوَاجَكُمُ الّٰٓـئِْ تُظٰهِرُوْنَ مِنْهُنَّ اُمَّهٰتِكُمْ ۚ وَمَا جَعَلَ اَدْعِيَآءَكُمْ اَبْنَآءَكُمْ ؕ ذٰلِكُمْ قَوْلُكُمْ بِاَفْوَاهِكُمْ ؕ وَاللّٰهُ يَقُوْلُ الْحَقَّ وَهُوَ يَهْدِى السَّبِيْلَ ⑤

5. අල්ලාහ් කිසිදු පිරිමියෙකුට ඔහුගේ පපුවෙහි හදවත් දෙකක් නොතැබුවේය. තවද නුඹලා මව්වරුන් යැයි ඇමතූ නුඹලාගේ භාර්යයාවන්ව ඔහු සැබෑ මව්වරුන් බවට පත්කළේ නැත. තවද නුඹලා දරුකමට හදාගත් අයව ඔහු නුඹලාගේ සැබෑ පුතුන් බවට පත් කළේද නැත. එය හුදෙක් නුඹලාගේ මුවින් දොඩන වදනයි. නමුත් අල්ලාහ් සත්‍යය පවසන්නේය. තවද ඔහු (යහ) මගට යොමුකරන්නේය.

اُدْعُوْهُمْ لِاٰبَآئِهِمْ هُوَ اَقْسَطُ عِنْدَ اللّٰهِ ۚ فَاِنْ لَّمْ تَعْلَمُوْۤا اٰبَآءَهُمْ فَاِخْوَانُكُمْ فِى الدِّيْنِ وَمَوَالِيْكُمْ ؕ وَلَيْسَ عَلَيْكُمْ جُنَاحٌ

6. ඔවුන්ව ඔවුන්ගේ පියවරුන්ගේ (නම්වලින්) අමතනු. එය අල්ලාහ් අභියස ඉතා සාධාරණය. නමුත් නුඹලා ඔවුන්ගේ පියවරුන්ව නොදන්නේ නම්, ඔවුන් ධර්මයෙහි නුඹලාගේ සොහොයුරන්ද නුඹලාගේ මිතුරන්ද වෙති. නුඹලාගේ හදවත්

فِيمَآ أَخْطَأْتُم بِهِۦ وَلَٰكِن مَّا تَعَمَّدَتْ قُلُوبُكُمْ ۚ وَكَانَ ٱللَّهُ غَفُورًا رَّحِيمًا ﴿٦﴾

ඕනෑකමින් කළ දේ හැර නුඹලා යම් චේතනාවෙන් තොරව වරදක් කළා නම් ඒ කෙරෙහි නුඹලාට දොසක් නැත. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

ٱلنَّبِىُّ أَوْلَىٰ بِٱلْمُؤْمِنِينَ مِنْ أَنفُسِهِمْ ۖ وَأَزْوَٰجُهُۥٓ أُمَّهَٰتُهُمْ ۗ وَأُو۟لُوا۟ ٱلْأَرْحَامِ بَعْضُهُمْ أَوْلَىٰ بِبَعْضٍ فِى كِتَٰبِ ٱللَّهِ مِنَ ٱلْمُؤْمِنِينَ وَٱلْمُهَٰجِرِينَ إِلَّآ أَن تَفْعَلُوٓا۟ إِلَىٰٓ أَوْلِيَآئِكُم مَّعْرُوفًا ۚ كَانَ ذَٰلِكَ فِى ٱلْكِتَٰبِ مَسْطُورًا ﴿٧﴾

7. විශ්වාසිතයින් හට තමන්ට වඩා වක්තෘවරයාණන් ඉතා සමීපය. තවද ඔහුගේ භාර්යයාවන් ඔවුන්ට මව්වරුන්ය. තවද අල්ලාහ්ගේ ග්‍රන්ථයට අනුව විශ්වාසිතයින් සහ සංක්‍රමණිකයින්ට වඩා ලේ ඥාතීන්ගෙන් ඇතැමුන් ඇතැමුන්ට වඩා සමීපය. නමුත් නුඹලා නුඹලාගේ මිතුරන් සමග යහපත් අයුරින් හැසිරිය යුතුය. මෙය ග්‍රන්ථයෙහි ලියනු ලැබ ඇත.

وَإِذْ أَخَذْنَا مِنَ ٱلنَّبِيِّۦنَ مِيثَٰقَهُمْ وَمِنكَ وَمِن نُّوحٍ وَإِبْرَٰهِيمَ وَمُوسَىٰ وَعِيسَى ٱبْنِ مَرْيَمَ ۖ وَأَخَذْنَا مِنْهُم مِّيثَٰقًا غَلِيظًا ﴿٨﴾

8. තවද අප වක්තෘවරයින්ගෙන් ඔවුන්ගේ ප්‍රතිඥාව ලබාගත් සැටි (සිහිපත් කරනු.) තවද ඔබගෙන්ද එමෙන්ම නුහ්, ඉබ්රාහිම්, මුසා සහ මරියම්ගේ පුත් ඊසාගෙන්ද වේ. තවද අපි ඔවුන්ගෙන් ස්ථිර ප්‍රතිඥාවක් ගත්තෙමු.

لِّيَسْـَٔلَ ٱلصَّٰدِقِينَ عَن صِدْقِهِمْ ۚ وَأَعَدَّ لِلْكَٰفِرِينَ عَذَابًا أَلِيمًا ﴿٩﴾

9. එය ඔහු සත්‍යවාදීන්ගෙන් ඔවුන්ගේ සත්‍යතාවය පිළිබඳව ප්‍රශ්ණ කරනු පිණිසය. තවද අවිශ්වාසිතයින්හට ඔහු වේදනීය දඬුවමක් පිළියෙල කර ඇත්තේය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ ٱذْكُرُوا۟ نِعْمَةَ ٱللَّهِ عَلَيْكُمْ إِذْ جَآءَتْكُمْ جُنُودٌ فَأَرْسَلْنَا عَلَيْهِمْ رِيحًا وَجُنُودًا لَّمْ تَرَوْهَا ۚ وَكَانَ ٱللَّهُ بِمَا تَعْمَلُونَ بَصِيرًا ﴿١٠﴾

10. එම්බල විශ්වාසිතයිනි! නුඹලා වෙත සේනාවන් පැමිණි කල්හි, නුඹලා කෙරෙහි (දැක්වූ) අල්ලාහ්ගේ අනුග්‍රහය සිහිපත් කරනු. පසුව අපි ඔවුනට එරෙහිව සැඩ සුළඟක්ද නුඹලා නොදුටුවා වූ සේනාවන්ද එව්වෙමු. තවද නුඹලා කරන දේ අල්ලාහ් බෙහෙවින් දකින්නේය.

11. ඔවුන් නුඹලාට ඉහළින් සහ නුඹලාට පහළින් පැමිණි විටද (නුඹලාගේ) ඇස් වික්ෂිප්ත වූ විටද (නුඹලාගේ) හදවත් උගුර කරා ළඟා වූ විටද නුඹලා අල්ලාහ් පිළිබඳව (විශ්වාස කළ නොහැකි) සිතුවිලි මවා ගත්තෙහුය.

إِذْ جَاءُوكُم مِّن فَوْقِكُمْ وَمِنْ أَسْفَلَ مِنكُمْ وَإِذْ زَاغَتِ الْأَبْصَارُ وَبَلَغَتِ الْقُلُوبُ الْحَنَاجِرَ وَتَظُنُّونَ بِاللَّهِ الظُّنُونَا ﴿١١﴾

12. එහි විශ්වාසිතයෝ පිරික්සනු ලැබුවෝය. තවද ඔවුන් දැඩි කම්පාවට ලක් කරනු ලැබුවෝය.

هُنَالِكَ ابْتُلِيَ الْمُؤْمِنُونَ وَزُلْزِلُوا زِلْزَالًا شَدِيدًا ﴿١٢﴾

13. තවද කුහකයින් සහ සිය හදවත්හි රෝගයක් ඇති අය, 'අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් අපට රැවටීමක් මිස අන් කිසිවක් පොරොන්දු වූයේ නැතැ'යි පැවසූ අවස්ථාව (සිහිපත් කරනු).

وَإِذْ يَقُولُ الْمُنَافِقُونَ وَالَّذِينَ فِي قُلُوبِهِم مَّرَضٌ مَّا وَعَدَنَا اللَّهُ وَرَسُولُهُ إِلَّا غُرُورًا ﴿١٣﴾

14. තවද ඔවුන්ගෙන් පිරිසක් 'එම්බල ◆යස්රිබ් හි ජනතාවනි! (සතුරන්ට එරෙහිව) නැගී සිටීමට නුඹලාට (හැකියාවක්) නොමැත. එබැවින් ආපසු යනු'යි පැවසූ අවස්ථාවද (සිහිපත් කරනු). එමෙන්ම ඔවුන්ගෙන් කොටසක් නබිවරයාණන්ගෙන් 'අපගේ නිවැස් අනාරක්ෂිතව ඇතැ'යි පවසමින් අවසර ඉල්ලා සිටියහ. තවද ඒවා අනාරක්ෂිත නොවිය. ඔවුන් පලායන්නටම තැත් කළහ.

وَإِذْ قَالَت طَّائِفَةٌ مِّنْهُمْ يَا أَهْلَ يَثْرِبَ لَا مُقَامَ لَكُمْ فَارْجِعُوا ۚ وَيَسْتَأْذِنُ فَرِيقٌ مِّنْهُمُ النَّبِيَّ يَقُولُونَ إِنَّ بُيُوتَنَا عَوْرَةٌ وَمَا هِيَ بِعَوْرَةٍ ۖ إِن يُرِيدُونَ إِلَّا فِرَارًا ﴿١٤﴾

15. තවද (නගරය තුලට) එහි සියලු දෙසින් ඔවුන්ට එරෙහිව ආක්‍රමණය කරනු ලැබ පසුව කෝලාහලයෙහි (සහභාගි වීමටත්) ඔවුන් කැඳවනු ලැබුවේ නම්, ඔවුන්ට (එවෙලෙහිම) එසේ කරන්නට තිබුණි. තවද (ඔවුන්ගේ නිවෙස්වල) ටික කලකට මිස ඔවුන් ගත නොකරනු ඇත.

وَلَوْ دُخِلَتْ عَلَيْهِم مِّنْ أَقْطَارِهَا ثُمَّ سُئِلُوا الْفِتْنَةَ لَآتَوْهَا وَمَا تَلَبَّثُوا بِهَا إِلَّا يَسِيرًا ﴿١٥﴾

16. තවද නියතවශයෙන්ම තමන් පිටු නොපාන්නේ යැයි ඔවුන් අල්ලාහ් වෙත මීට පෙරත් ප්‍රතිඥා දුන්හ.

وَلَقَدْ كَانُوا عَاهَدُوا اللَّهَ مِن قَبْلُ

◆ සංක්‍රමණයට පෙර මදීනා නගරය මෙම නාමයෙන් හඳුන්වනු ලැබීය.

لَا يُوَلُّوْنَ الْاَدْبَارَ ؕ وَكَانَ عَهْدُ اللّٰهِ مَسْـُٔوْلًا ﴿١٦﴾

තවද අල්ලාහ් වෙත දුන් ප්‍රතිඥාව සම්බන්ධයෙන් නියතවශයෙන්ම ප්‍රශ්ණ කරනු ලබන්නේය.

قُلْ لَّنْ يَّنْفَعَكُمُ الْفِرَارُ اِنْ فَرَرْتُمْ مِّنَ الْمَوْتِ اَوِ الْقَتْلِ وَاِذًا لَّا تُمَتَّعُوْنَ اِلَّا قَلِيْلًا ﴿١٧﴾

17. පවසන්න, 'නුඹලා මරණයෙන් හෝ ඝාතනයෙන් හෝ පලා ගියේ නම් එම පලායෑම නුඹලාට කිසිදු ඵලක් නොවන්නේය. තවද එසේ වුවානම් නුඹලා භුක්ති විඳින්නේ ස්වල්පයක් මිස නැත'.

قُلْ مَنْ ذَا الَّذِيْ يَعْصِمُكُمْ مِّنَ اللّٰهِ اِنْ اَرَادَ بِكُمْ سُوْٓءًا اَوْ اَرَادَ بِكُمْ رَحْمَةً ؕ وَلَا يَجِدُوْنَ لَهُمْ مِّنْ دُوْنِ اللّٰهِ وَلِيًّا وَّلَا نَصِيْرًا ﴿١٨﴾

18. පවසන්න, 'ඔහුගේ අභිමතය නුඹලාට හානියක් කිරීමට නම් හෝ ඔහුගේ අභිමතය නුඹලාට දයාව දැක්වීමට නම් අල්ලාහ්ගෙන් නුඹලාව ආරක්ෂා කළ හැක්කේ කවරෙකුටද?' තවද ඔවුන්ට අල්ලාහ් හැර අන් මිතුරෙකු හෝ උදව්කරුවෙකු හෝ නොලැබෙනු ඇත.

قَدْ يَعْلَمُ اللّٰهُ الْمُعَوِّقِيْنَ مِنْكُمْ وَالْقَآئِلِيْنَ لِاِخْوَانِهِمْ هَلُمَّ اِلَيْنَا ۚ وَلَا يَاْتُوْنَ الْبَاْسَ اِلَّا قَلِيْلًا ۙ ﴿١٩﴾

19. සැබැවින්ම නුඹලා අතරින් (සටනෙහි මිනිසුන්ව) වළක්වන අයවද තමන්ගේ සහෝදරයින්ට 'අප වෙත එනු'යි පවසන අයවද අල්ලාහ් දන්නේය. තවද සුළුතරයක් මිස ඔවුන් සටනට නොඑන්නෝය.

اَشِحَّةً عَلَيْكُمْ ۖۚ فَاِذَا جَآءَ الْخَوْفُ رَاَيْتَهُمْ يَنْظُرُوْنَ اِلَيْكَ تَدُوْرُ اَعْيُنُهُمْ كَالَّذِيْ يُغْشٰى عَلَيْهِ مِنَ الْمَوْتِ ۚ فَاِذَا ذَهَبَ الْخَوْفُ سَلَقُوْكُمْ بِاَلْسِنَةٍ حِدَادٍ اَشِحَّةً عَلَى الْخَيْرِ ؕ اُولٰٓئِكَ لَمْ يُؤْمِنُوْا فَاَحْبَطَ اللّٰهُ اَعْمَالَهُمْ ؕ وَكَانَ ذٰلِكَ عَلَى اللّٰهِ يَسِيْرًا ﴿٢٠﴾

20. නුඹලා කෙරෙහි (ඔවුන්) මසුරුකම් දක්වන්නන් වෙති. නමුත් අනතුරක් පැමිණෙන විට, මරණය හේතුකොටගෙන ක්ලාන්ත කරනු ලැබුවෙකු මෙන් ඔවුන්ගේ ඇස් කරකවමින් ඔබ දෙස බලන්නන් සේ ඔබ ඔවුන්ව දකින්නෙහිය. නමුත් අනතුර පහවී ගිය විට, ධනය කෙරෙහි තණ්හා වුවන් වෙමින් තියුණු දිව් මගින් ඔවුන් නුඹලාට අඩම්තේට්ටම් කරන්නෝය. ඔවුන් කිසිවිටෙකත් විශ්වාස නොකළහ. එබැවින් ඔවුන්ගේ ක්‍රියාවන් අල්ලාහ් සහමුලින්ම නිෂ්ඵල කළේය. තවද එය අල්ලාහ්ට පහසු කාර්යයකි.

21. (ආක්‍රමණකාරී) ගෝත්‍රිකයින් ආපසු ගොස් නැතැයි ඔවුහු සිතන්නෝය. තවද, එම ගෝත්‍රිකයින් (නැවත) ආක්‍රමණය කළේ නම් ඔවුන්ද කාන්තාරයෙහි පිටිසර අරාබිවරුන් අතර සිටින්නට කැමති වනු ඇත. තවද නුඹලාගේ තොරතුරු විමසනු ඇත. තවද ඔවුන් නුඹලා අතර සිටියත් සුළුතරයක් මිස ඔවුන් සටන් නොකරනු ඇත.

يَحْسَبُونَ الْأَحْزَابَ لَمْ يَذْهَبُوا ۚ وَإِن يَأْتِ الْأَحْزَابُ يَوَدُّوا لَوْ أَنَّهُم بَادُونَ فِي الْأَعْرَابِ يَسْأَلُونَ عَنْ أَنبَائِكُمْ ۖ وَلَوْ كَانُوا فِيكُم مَّا قَاتَلُوا إِلَّا قَلِيلًا ﴿٢١﴾

22. අල්ලාහ් සහ අවසාන දිනය කෙරෙහි බිය දක්වන මෙන්ම අල්ලාහ්ව බෙහෙවින් සිහිපත් කරන අයහට සැබැවින්ම අල්ලාහ්ගේ වක්තෘවරයාණන් තුළ විශිෂ්ඨ වූ ආදර්ශයක් නුඹලාට ඇත.

لَّقَدْ كَانَ لَكُمْ فِي رَسُولِ اللَّهِ أُسْوَةٌ حَسَنَةٌ لِّمَن كَانَ يَرْجُو اللَّهَ وَالْيَوْمَ الْآخِرَ وَذَكَرَ اللَّهَ كَثِيرًا ﴿٢٢﴾

23. තවද විශ්වාසිතයින් ආක්‍රමණිකයින්ව දුටු විට ඔවුහු, 'අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් අපට පොරොන්දු වූ දේ මෙය වේ. තවද අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් සත්‍යය පැවසූහ'යි කීහ. තවද එය ඔවුන්ගේ විශ්වාසය සහ අවනතභාවය වැඩි කළා මිස නැත.

وَلَمَّا رَأَى الْمُؤْمِنُونَ الْأَحْزَابَ قَالُوا هَٰذَا مَا وَعَدَنَا اللَّهُ وَرَسُولُهُ وَصَدَقَ اللَّهُ وَرَسُولُهُ ۚ وَمَا زَادَهُمْ إِلَّا إِيمَانًا وَتَسْلِيمًا ﴿٢٣﴾

24. විශ්වාසිතයින් අතර තමන් අල්ලාහ් සමග පොරොන්දු වූ දේ සැබෑ කළාවූ මිනිසුන්ද වෙති. ඔවුන්ගෙන් සමහරු තමන්ගේ භාරය ඉටු කළ අයද වෙති. තවද ඔවුන්ගෙන් තවත් (සමහරු තවමත්) බලාපොරොත්තුවෙන් සිටින්නෝය. තවද ඔවුන් (තමන්ගේ තත්ත්වය) අල්පයක්වත් වෙනසක් කර නොමැත.

مِّنَ الْمُؤْمِنِينَ رِجَالٌ صَدَقُوا مَا عَاهَدُوا اللَّهَ عَلَيْهِ ۖ فَمِنْهُم مَّن قَضَىٰ نَحْبَهُ وَمِنْهُم مَّن يَنتَظِرُ ۖ وَمَا بَدَّلُوا تَبْدِيلًا ﴿٢٤﴾

25. මෙය හේතුවෙන් සත්‍යවාදීන්හට ඔවුන්ගේ සත්‍යවන්තකම නිසා අල්ලාහ් තිළිණය දෙනු ඇත. තවද ඔහු අභිමත වුයේ නම් කුහකයින්ට දඬුවම් කරනු ඇත. නැතහොත් දයාලුභාවයෙන් ඔවුන් වෙත හැරෙනු ඇත. සැබැවින්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරමදයාබරය.

لِّيَجْزِيَ اللَّهُ الصَّادِقِينَ بِصِدْقِهِمْ وَيُعَذِّبَ الْمُنَافِقِينَ إِن شَاءَ أَوْ يَتُوبَ عَلَيْهِمْ ۚ إِنَّ اللَّهَ كَانَ غَفُورًا رَّحِيمًا ﴿٢٥﴾

وَرَدَّ اللّٰهُ الَّذِيْنَ كَفَرُوْا بِغَيْظِهِمْ لَمْ يَنَالُوْا خَيْرًا ۗ وَكَفَى اللّٰهُ الْمُؤْمِنِيْنَ الْقِتَالَ ۗ وَكَانَ اللّٰهُ قَوِيًّا عَزِيْزًا ۚ ﴿٢٦﴾

26. තවද, අල්ලාහ් අවිශ්වාසිතයින්ව ඔවුන් කිසිදු යහපතක් නොලැබුවන් සේ ඔවුන්ගේ කෝපය සමග ආපසු හැරෙව්වේය. තවද, විශ්වාසිතයින්හට සටනෙහි අල්ලාහ් ප්‍රමාණවත් විය. තවද, අල්ලාහ් ශක්ති සම්පන්නය, බලසම්පන්නය.

وَاَنْزَلَ الَّذِيْنَ ظَاهَرُوْهُمْ مِّنْ اَهْلِ الْكِتٰبِ مِنْ صَيَاصِيْهِمْ وَقَذَفَ فِيْ قُلُوْبِهِمُ الرُّعْبَ فَرِيْقًا تَقْتُلُوْنَ وَتَاْسِرُوْنَ فَرِيْقًا ۚ ﴿٢٧﴾

27. තවද, පුස්තකය හිමි ජනතාවගෙන් (සටනට එළඹි) අයහට අනුබල දුන් අයව ඔවුන්ගේ බලකොටුවලින් ඔහු පහළට බැස්සුවේය. තවද, ඔවුන්ගේ සිත් තුලට භීතිය ඇති කළේය. නුඹලා සමහරුන්ව ඝාතනය කළෙහුය. තවද, නුඹලා සමහරුන්ව සිරභාරයට ගත්තෙහුය.

وَاَوْرَثَكُمْ اَرْضَهُمْ وَدِيَارَهُمْ وَاَمْوَالَهُمْ وَاَرْضًا لَّمْ تَطَئُوْهَا ۗ وَكَانَ اللّٰهُ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرًا ﴿٢٨﴾ ع

28. තවද, ඔහු නුඹලාට ඔවුන්ගේ භූමියද ඔවුන්ගේ නිවැස්ද ඔවුන්ගේ වස්තූන්ද තවද, නුඹලා කිසිදිනෙක පය නොතැබූවාවූ භූමියද උරුම කර දුන්නේය. තවද, අල්ලාහ් සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

يٰۤاَيُّهَا النَّبِيُّ قُلْ لِّاَزْوَاجِكَ اِنْ كُنْتُنَّ تُرِدْنَ الْحَيٰوةَ الدُّنْيَا وَزِيْنَتَهَا فَتَعَالَيْنَ اُمَتِّعْكُنَّ وَاُسَرِّحْكُنَّ سَرَاحًا جَمِيْلًا ﴿٢٩﴾

29. එම්බල වක්තෘවරයාණෙනි! ඔබගේ භාර්යයාවන්ට (මෙසේ) පවසන්න. 'නුඹලා මෙලොව ජීවිතය සහ එහි අලංකාරයට කැමති වන්නේ නම්, එනු! මම නුඹලාට ලෞකික දේ සපයා යහපත් අයුරින් නුඹලාව පිටත් කර හරින්නෙමි'.

وَاِنْ كُنْتُنَّ تُرِدْنَ اللّٰهَ وَرَسُوْلَهٗ وَالدَّارَ الْاٰخِرَةَ فَاِنَّ اللّٰهَ اَعَدَّ لِلْمُحْسِنٰتِ مِنْكُنَّ اَجْرًا عَظِيْمًا ﴿٣٠﴾

30. 'නමුත් නුඹලා අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද පරලොවෙහි නිවසටද කැමති වන්නේ නම් ඇත්තෙන්ම නුඹලාගෙන් යහකම් කරන අය සඳහා මහත් වූ තිළිණයක් අල්ලාහ් පිළියෙල කර ඇත්තේය'.

يٰنِسَآءَ النَّبِيِّ مَنْ يَّاْتِ مِنْكُنَّ بِفَاحِشَةٍ مُّبَيِّنَةٍ يُّضٰعَفْ لَهَا الْعَذَابُ ضِعْفَيْنِ ۗ

31. එම්බල වක්තෘවරයාණන්ගේ භාර්යයාවරුනි! නුඹලාගෙන් කවුරුන් හෝ ප්‍රකට වූ නින්දිත හැසිරීමේ වරදට හසුවුවහොත් ඇයට දඬුවම

وَكَانَ ذَٰلِكَ عَلَى ٱللَّهِ يَسِيرًا ﴿٣٠﴾

දෙගුණ කරනු ලබන්නේය. මෙය අල්ලාහ්ට පහසු දෙයකි.

وَمَن يَقْنُتْ مِنكُنَّ لِلَّهِ وَرَسُولِهِۦ وَتَعْمَلْ صَٰلِحًا نُّؤْتِهَآ أَجْرَهَا مَرَّتَيْنِ وَأَعْتَدْنَا لَهَا رِزْقًا كَرِيمًا ﴿٣١﴾

32. නමුත් නුඹලාගෙන් කවුරුන් හෝ අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද අවනත වී යහපත් ක්‍රියාවන් කරන්නේද අපි ඇයට ඇයගේ තිළිණය දෙගුණයකින් පිරිනමන්නෙමු. තවද අපි ඇයට ගෞරවනීය ජීවනෝපායක් පිළියෙල කර ඇත්තෙමු.

يَٰنِسَآءَ ٱلنَّبِىِّ لَسْتُنَّ كَأَحَدٍ مِّنَ ٱلنِّسَآءِ إِنِ ٱتَّقَيْتُنَّ فَلَا تَخْضَعْنَ بِٱلْقَوْلِ فَيَطْمَعَ ٱلَّذِى فِى قَلْبِهِۦ مَرَضٌ وَقُلْنَ قَوْلًا مَّعْرُوفًا ﴿٣٢﴾

33. එම්බල වක්තෘවරයාණන්ගේ භාර්යාවරුනි! නුඹලා බියබැතිමත් වන්නේ නම් නුඹලා (අන්) ස්ත්‍රීන් මෙන් නොවන්නෙහුය. එබැවින් කථාවෙහි මෘදු නොවනු. එසේ වුවහොත් කවරෙකුගේ හදවතෙහි රෝගයක් තිබේද ඔහු පෙළඹීමට ඉඩ ඇත. තවද විනීතව කථා කරනු.

وَقَرْنَ فِى بُيُوتِكُنَّ وَلَا تَبَرَّجْنَ تَبَرُّجَ ٱلْجَٰهِلِيَّةِ ٱلْأُولَىٰ وَأَقِمْنَ ٱلصَّلَوٰةَ وَءَاتِينَ ٱلزَّكَوٰةَ وَأَطِعْنَ ٱللَّهَ وَرَسُولَهُۥٓ إِنَّمَا يُرِيدُ ٱللَّهُ لِيُذْهِبَ عَنكُمُ ٱلرِّجْسَ أَهْلَ ٱلْبَيْتِ وَيُطَهِّرَكُمْ تَطْهِيرًا ﴿٣٣﴾

34. තවද (ගෞරවයෙන් යුතුව) නුඹලාගේ නිවෙස්වල රැඳී සිටිනු. පෙර අඥාන කාලයේ සැරසිලි විලාසය මෙන් නුඹලාව සැරසිලි නොකරනු. තවද නමස්කාරයෙහි නිරතවනු. තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු. තවද අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට අවනත වනු. එම්බල නිවැසියෙනි! නියතවශයෙන්ම අල්ලාහ් නුඹලාගෙන් (සියලුම) අපවිත්‍රතාවයන් දුරු කිරීමටද නුඹලාව සම්පූර්ණයෙන්ම පවිත්‍ර කිරීමටද කැමති වන්නේය.

وَٱذْكُرْنَ مَا يُتْلَىٰ فِى بُيُوتِكُنَّ مِنْ ءَايَٰتِ ٱللَّهِ وَٱلْحِكْمَةِ إِنَّ ٱللَّهَ كَانَ لَطِيفًا خَبِيرًا ﴿٣٤﴾

35. තවද නුඹලාගේ නිවෙස්හි පාරායනා කරනු ලබන අල්ලාහ්ගේ වදන් සහ ප්‍රඥාව සිහිපත් කරනු. සැබැවින්ම අල්ලාහ් සූක්ෂම ඥානය ඇත්තාය, සියල්ලෙහි විමසිලිමත්ය.

إِنَّ ٱلْمُسْلِمِينَ وَٱلْمُسْلِمَٰتِ وَٱلْمُؤْمِنِينَ وَٱلْمُؤْمِنَٰتِ وَٱلْقَٰنِتِينَ وَٱلْقَٰنِتَٰتِ

36. නියතවශයෙන්ම (අල්ලාහ්ට) අවනත වන පුරුෂයින්ද (ඔහුට) අවනත වන ස්ත්‍රීන්ද විශ්වාසිත පුරුෂයින්ද විශ්වාසිත ස්ත්‍රීන්ද කීකරු පුරුෂයින්ද කීකරු ස්ත්‍රීන්ද සත්‍යවාදී

وَالصّٰدِقِيْنَ وَالصّٰدِقٰتِ وَالصّٰبِرِيْنَ
وَالصّٰبِرٰتِ وَالْخٰشِعِيْنَ وَالْخٰشِعٰتِ
وَالْمُتَصَدِّقِيْنَ وَالْمُتَصَدِّقٰتِ وَالصَّآئِمِيْنَ
وَالصّٰٓئِمٰتِ وَالْحٰفِظِيْنَ فُرُوْجَهُمْ
وَالْحٰفِظٰتِ وَالذّٰكِرِيْنَ اللّٰهَ كَثِيْرًا
وَّالذّٰكِرٰتِ ۙ اَعَدَّ اللّٰهُ لَهُمْ مَّغْفِرَةً
وَّاَجْرًا عَظِيْمًا ﴿٣٦﴾

පුරුෂයින්ද සත්‍යවාදී ස්ත්‍රීන්ද (තම අවංකභාවයෙහි) ස්ථිරසාර පුරුෂයින්ද ස්ථිරසාර ස්ත්‍රීන්ද නිහතමානී පුරුෂයින්ද නිහතමානී ස්ත්‍රීන්ද දන් දෙන පුරුෂයින්ද දන් දෙන ස්ත්‍රීන්ද උපවාසය රකින පුරුෂයින්ද උපවාසය රකින ස්ත්‍රීන්ද පතිවත රකින පුරුෂයින්ද පතිවත රකින ස්ත්‍රීන්ද අල්ලාහ්ව බෙහෙවින් සිහිකරන පුරුෂයින්ද (ඔහුව) සිහිකරන ස්ත්‍රීන්ද වන මොවුන් (සියල්ලන්)ට අල්ලාහ් ක්ෂමාවද මහත් වූ තිළිණයක්ද පිළියෙල කර ඇත.

وَمَا كَانَ لِمُؤْمِنٍ وَّلَا مُؤْمِنَةٍ اِذَا قَضَى
اللّٰهُ وَرَسُوْلُهٗۤ اَمْرًا اَنْ يَّكُوْنَ لَهُمُ
الْخِيَرَةُ مِنْ اَمْرِهِمْ ؕ وَمَنْ يَّعْصِ اللّٰهَ
وَرَسُوْلَهٗ فَقَدْ ضَلَّ ضَلٰلًا مُّبِيْنًا ؕ ﴿٣٧﴾

37. තවද විශ්වාසිත පුරුෂයෙකුට හෝ විශ්වාසිත ස්ත්‍රියකට හෝ අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් යම් කාරණයක් සම්බන්ධයෙන් තීරණයක් දුන් පසු තමන් පිළිබඳව කාරණය තීරණය ගැනීමේ අයිතියක් ඔවුනට නැත. තවද කවුරුන් හෝ අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට අවනත නොවන්නේද ඔහු නියතවශයෙන්ම ප්‍රත්‍යක්ෂ වරදෙහි නොමග යන්නේය.

وَاِذْ تَقُوْلُ لِلَّذِيْۤ اَنْعَمَ اللّٰهُ عَلَيْهِ
وَاَنْعَمْتَ عَلَيْهِ اَمْسِكْ عَلَيْكَ زَوْجَكَ
وَاتَّقِ اللّٰهَ وَتُخْفِيْ فِيْ نَفْسِكَ مَا اللّٰهُ
مُبْدِيْهِ وَتَخْشَى النَّاسَ ۚ وَاللّٰهُ اَحَقُّ اَنْ
تَخْشٰىهُ ؕ فَلَمَّا قَضٰى زَيْدٌ مِّنْهَا وَطَرًا
زَوَّجْنٰكَهَا لِكَيْ لَا يَكُوْنَ عَلَى الْمُؤْمِنِيْنَ
حَرَجٌ فِيْۤ اَزْوَاجِ اَدْعِيَآئِهِمْ اِذَا قَضَوْا

38. තවද කෙනෙකුට අල්ලාහ් අනුග්‍රහයන් පිරිනමා එමෙන්ම ඔබද අනුග්‍රහයන් පිරිනමා ඇති එවැන්නෙකුට 'ඔබගේ භාර්යයාව (දික්කසාද නොදී) ඔබ වෙතම රඳවාගන්න. එමෙන්ම අල්ලාහ්ට බිය වන්නැ'යි ඔබ කියූ අවස්ථාව (සිහිපත් කරන්න). තවද අල්ලාහ් හෙළි කිරීමට යන දේ ඔබගේ සිතෙහි ඔබ සඟවා ගත්තෙහිය. තවද ඔබ ජනතාවට බියෙන් සිටියෙහිය. එමෙන්ම ඔබ බිය වීමට ඉතා සුදුස්සා අල්ලාහ්ම වන්නේය. තවද ඇය සම්බන්ධයෙන් zසයිද් තම (දික්කසාද වීමේ) උවමනාව ඉටු කරගත් පසු අපි ඔබට ඇයව විවාහ කර ගැනීමට සැලැස්වූවෙමු. එය විශ්වාසිතයින් තමන් හදාවඩාගත් තම පුතුන්ගේ

مِنْهُنَّ وَطَرًا ۚ وَكَانَ أَمْرُ اللَّهِ مَفْعُولًا ﴿٣٨﴾

භාර්යයාවන් සම්බන්ධයෙන් ඔවුන්ගේ (දික්කසාද වීමේ) උවමනාව ඉටුකරගත් පසු තමන් සම්බන්ධයෙන් කිසිදු බාධාවක් ඇති නොවනු පිණිසය. තවද අල්ලාහ්ගේ නියමය ඉටුවන්නේමය.

مَا كَانَ عَلَى النَّبِيِّ مِنْ حَرَجٍ فِيمَا فَرَضَ اللَّهُ لَهُ ۖ سُنَّةَ اللَّهِ فِي الَّذِينَ خَلَوْا مِنْ قَبْلُ ۚ وَكَانَ أَمْرُ اللَّهِ قَدَرًا مَقْدُورًا ﴿٣٩﴾

39. වක්තෘවරයාණන් හට අල්ලාහ් අනිවාර්යය කළ දේ (ක්‍රියාවට නැංවීම) පිළිබඳව ඔහුට කිසිදු දොසක් නොවන්නේය. පෙර සිටි අය සම්බන්ධවද අල්ලාහ්ගේ ක්‍රියා මාර්ගය ඇත්තෙන්ම මෙලෙසම විය. තවද අල්ලාහ්ගේ නියෝගය, තීරණය කරන ලද නියමයකි.

الَّذِينَ يُبَلِّغُونَ رِسَالَاتِ اللَّهِ وَيَخْشَوْنَهُ وَلَا يَخْشَوْنَ أَحَدًا إِلَّا اللَّهَ ۗ وَكَفَىٰ بِاللَّهِ حَسِيبًا ﴿٤٠﴾

40. (අල්ලාහ්ගේ ක්‍රියාමාර්ගය ඉටු කළ) මෙවන් අය අල්ලාහ්ගේ පණිවිඩයන් ප්‍රචාරය කළ අය වෙති. තවද ඔහුට බිය වූහ. තවද අල්ලාහ්ට හැර අන් කිසිවෙකුට බිය නොදැක්වූහ. තවද ගණන් ගන්නෙකු වශයෙන් අල්ලාහ් ප්‍රමාණවත්ය.

مَا كَانَ مُحَمَّدٌ أَبَا أَحَدٍ مِنْ رِجَالِكُمْ وَلَٰكِنْ رَسُولَ اللَّهِ وَخَاتَمَ النَّبِيِّينَ ۗ وَكَانَ اللَّهُ بِكُلِّ شَيْءٍ عَلِيمًا ﴿٤١﴾

41. මුහම්මද් නුඹලාගේ පුරුෂයින්ගෙන් කිසිවෙකුගේත් පියෙක් නොවේ. නමුත් ඔහු අල්ලාහ්ගේ දූතයාණන්ද වක්තෘවරුන්ගේ මුද්‍රාවද වන්නේය. තවද අල්ලාහ් සියළු දේ ගැන මැනැවින් දන්නේය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا اذْكُرُوا اللَّهَ ذِكْرًا كَثِيرًا ﴿٤٢﴾

42. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ව වැඩි වැඩියෙන් සිහිපත් කරනු.

وَسَبِّحُوهُ بُكْرَةً وَأَصِيلًا ﴿٤٣﴾

43. තවද උදය සහ සවස ඔහුව සුවිශුද්ධ කරනු.

هُوَ الَّذِي يُصَلِّي عَلَيْكُمْ وَمَلَائِكَتُهُ لِيُخْرِجَكُمْ مِنَ الظُّلُمَاتِ إِلَى النُّورِ ۚ وَكَانَ بِالْمُؤْمِنِينَ رَحِيمًا ﴿٤٤﴾

44. නුඹලාව (සෑම ආකාරයේ) අඳුරින් ආලෝකය වෙතට ගෙන එනු පිණිස නුඹලා කෙරෙහි ආශිර්වාදයන් එවන්නේ ඔහුමය. ඔහුගේ සුරදූතයින්ද එසේ (කරන්නෝ)ය. තවද ඔහු විශ්වාසිතයින්ට පරම දයාබරය.

تَحِيَّتُهُمْ يَوْمَ يَلْقَوْنَهُ سَلَٰمٌ ۚ وَأَعَدَّ لَهُمْ أَجْرًا كَرِيمًا ﴿٤٥﴾

45. ඔහුව ඔවුන් හමුවන එදින ඔවුන්ගේ සුභ පැතිම වන්නේ 'සාමය' යන්නයි. තවද ඔහු ඔවුන් හට ගෞරවාන්විත තිළිණයක් පිළියෙල කර ඇත.

يَٰٓأَيُّهَا ٱلنَّبِىُّ إِنَّآ أَرْسَلْنَٰكَ شَٰهِدًا وَمُبَشِّرًا وَنَذِيرًا ﴿٤٦﴾

46. එම්බල වක්තෘවරයාණෙනි! ඇත්තෙන්ම අපි ඔබව සාක්ෂිකරුවෙකු ලෙසද සුභාරංචි ගෙන එන්නෙකු ලෙසද අවවාද කරන්නෙකු ලෙසද එව්වෙමු.

وَدَاعِيًا إِلَى ٱللَّهِ بِإِذْنِهِۦ وَسِرَاجًا مُّنِيرًا ﴿٤٧﴾

47. තවද අල්ලාහ් වෙත ඔහුගේ විධානයෙන් කැඳවුම්කරුවෙකු ලෙසද දීප්තිමත් පහනක් ලෙසද.

وَبَشِّرِ ٱلْمُؤْمِنِينَ بِأَنَّ لَهُم مِّنَ ٱللَّهِ فَضْلًا كَبِيرًا ﴿٤٨﴾

48. තවද විශ්වාසිතයින්ට ඔවුන් වෙනුවෙන් අල්ලාහ්ගෙන් මහත් වූ වරප්‍රසාදයක් ඇති බවට සුභාරංචි දෙන්න.

وَلَا تُطِعِ ٱلْكَٰفِرِينَ وَٱلْمُنَٰفِقِينَ وَدَعْ أَذَىٰهُمْ وَتَوَكَّلْ عَلَى ٱللَّهِ ۚ وَكَفَىٰ بِٱللَّهِ وَكِيلًا ﴿٤٩﴾

49. තවද අවිශ්වාසිතයින්වද කුහකයින්වද අනුගමනය නොකරන්න. එමෙන්ම ඔවුන්ගේ හිරිහැරයන් නොසළකා හරින්න. තවද අල්ලාහ් කෙරෙහිම විශ්වාසය තබන්න. මන්ද අල්ලාහ් ආරක්ෂකයෙකු ලෙස ප්‍රමාණවත්ය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوٓا۟ إِذَا نَكَحْتُمُ ٱلْمُؤْمِنَٰتِ ثُمَّ طَلَّقْتُمُوهُنَّ مِن قَبْلِ أَن تَمَسُّوهُنَّ فَمَا لَكُمْ عَلَيْهِنَّ مِنْ عِدَّةٍ تَعْتَدُّونَهَا ۖ فَمَتِّعُوهُنَّ وَسَرِّحُوهُنَّ سَرَاحًا جَمِيلًا ﴿٥٠﴾

50. එම්බල විශ්වාසිතයිනි! නුඹලා විශ්වාසිත ස්ත්‍රීන්ව විවාහ කරගෙන පසුව නුඹලා ඔවුන්ව ස්පර්ශ කිරීමට පෙර දික්කසාද කරන්නේ නම් නුඹලා ගණන් බලන ඉද්දත් (නියමිත බලාපොරොත්තු කාලය) සම්බන්ධයෙන් ඔවුන් කෙරෙහි නුඹලාට කිසිදු අයිතියක් නොමැත. එබැවින් ඔවුන් සඳහා ඇතැම් ජීවනෝපාය සලසා දෙනු. තවද ඔවුන්ව උචිත අන්දමින් පිටත් කර හරිනු.

يَٰٓأَيُّهَا ٱلنَّبِىُّ إِنَّآ أَحْلَلْنَا لَكَ أَزْوَٰجَكَ ٱلَّٰتِىٓ ءَاتَيْتَ أُجُورَهُنَّ وَمَا مَلَكَتْ

51. එම්බල වක්තෘවරයාණෙනි! ඔබ මහර් දායාදය දුන් ඔබගේ භාර්යයාවන්ද අල්ලාහ් ඔබ හට යුද්ධය හේතුකොට ගෙන ලබා දී ඇති අයගෙන් ඔබගේ දකුණත් හිමි

කරගත් අයද ඔබගේ පියාගේ සහෝදරයන්ගේ දියණියන්ද ඔබගේ පියාගේ සහෝදරියන්ගේ දියණියන්ද ඔබගේ මවගේ සහෝදරයන්ගේ දියණියන්ද ඔබ සමග සංක්‍රමණය කළ ඔබගේ මවගේ සහෝදරියන්ගේ දියණියන්ද වක්තෘවරයාණන්ව විවාහ වීමට කැමති වී (විවාහය සඳහා) තමන්ව කැප කරන විශ්වාසිත වෙනත් ස්ත්‍රියද අපි ඔබට අනුමත කර ඇත්තෙමු. (මෙම අනුග්‍රහය) අන් විශ්වාසිතයින් හැරෙන්නට ඔබ සඳහා පමණය. ඔබහට (ඔබගේ කාර්ය්‍යය ඉටු කිරීමෙහිලා) කිසිදු අපහසුතාවයක් නොවනු පිණිස (විශ්වාසිත) ඔවුන්ට ඔවුන්ගේ භාර්ය්‍යාවන් සහ ඔවුන්ගේ දකුණත් හිමි කරගත් අය පිළිබඳව අප (විශ්වාසිත) ඔවුනට විධානය කර ඇති දේ අපි පෙරාතුවම දැන සිටින්නෙමු. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

يَمِينُكَ مِمَّآ أَفَآءَ اللَّهُ عَلَيْكَ وَبَنٰتِ عَمِّكَ وَبَنٰتِ عَمّٰتِكَ وَبَنٰتِ خَالِكَ وَبَنٰتِ خٰلٰتِكَ الّٰتِىْ هَاجَرْنَ مَعَكَ ۫ وَامْرَاَةً مُّؤْمِنَةً اِنْ وَّهَبَتْ نَفْسَهَا لِلنَّبِىِّ اِنْ اَرَادَ النَّبِىُّ اَنْ يَّسْتَنْكِحَهَا ۗ خَالِصَةً لَّكَ مِنْ دُوْنِ الْمُؤْمِنِيْنَ ؕ قَدْ عَلِمْنَا مَا فَرَضْنَا عَلَيْهِمْ فِىْٓ اَزْوَاجِهِمْ وَمَا مَلَكَتْ اَيْمَانُهُمْ لِكَيْلَا يَكُوْنَ عَلَيْكَ حَرَجٌ ؕ وَكَانَ اللَّهُ غَفُوْرًا رَّحِيْمًا ﴿٥١﴾

52. ඔබ කැමති නම් (ඔබගේ භාර්ය්‍යාවන් වන) ඔවුන්ගෙන් ඕනෑම කෙනෙකුව ඔබට අත්හැරිය හැක. තවද ඔබ කැමති ඕනෑම කෙනෙකුව ඔබ වෙත තබා ගත හැක. තවද ඔබ කැමති වන්නේ නම් ඔබ අත් හැර ඇති ඕනෑම කෙනෙකුව (ආපසු ගැනීමෙන්) ඔබට කිසිදු දොසක් නොමැත. මෙය ඔවුන්ගේ ඇස් සිසිලස ගෙනදීමටද ඔවුන් කණස්සල්ලට පත් නොවන්නටද ඔබ ඔවුනට දුන් දෙයින් ඔවුන් සියල්ල සතුටු වන්නටද වේ. තවද අල්ලාහ් නුඹලාගේ හදවත්හි ඇති දේ දන්නේය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ඉවසිලිවන්තය.

تُرْجِىْ مَنْ تَشَآءُ مِنْهُنَّ وَتُـْٔوِىْٓ اِلَيْكَ مَنْ تَشَآءُ ؕ وَمَنِ ابْتَغَيْتَ مِمَّنْ عَزَلْتَ فَلَا جُنَاحَ عَلَيْكَ ؕ ذٰلِكَ اَدْنٰىٓ اَنْ تَقَرَّ اَعْيُنُهُنَّ وَلَا يَحْزَنَّ وَيَرْضَيْنَ بِمَآ اٰتَيْتَهُنَّ كُلُّهُنَّ ؕ وَاللَّهُ يَعْلَمُ مَا فِىْ قُلُوْبِكُمْ ؕ وَكَانَ اللَّهُ عَلِيْمًا حَلِيْمًا ﴿٥٢﴾

53. මෙයට පසු (තවත්) ස්ත්‍රීන්ව (විවාහ කර ගැනීම) ඔබට අනුමත නැත. තවද ඔබගේ දකුණත හිමිකරගත් අය හැරෙන්නට (දැනට සිටින ඔබගේ භාර්ය්‍යාවන් වන) ඔවුන් වෙනුවට (අන්) භාර්ය්‍යාවන්, ඔවුන්ගේ ගුණාංග ඔබට කෙතරම් ප්‍රිය වුවද

لَا يَحِلُّ لَكَ النِّسَآءُ مِنْۢ بَعْدُ وَلَآ اَنْ تَبَدَّلَ بِهِنَّ مِنْ اَزْوَاجٍ وَّلَوْ اَعْجَبَكَ حُسْنُهُنَّ اِلَّا مَا مَلَكَتْ يَمِيْنُكَ ؕ وَكَانَ اللَّهُ عَلٰى

كُلِّ شَيْءٍ رَّقِيبًا ﴿٥٢﴾

අනුමත නැත. එමෙන්ම අල්ලාහ් සියළු දේ කෙරෙහි සුපරීක්ෂකාරීය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا لَا تَدْخُلُوا بُيُوتَ النَّبِيِّ إِلَّا أَن يُؤْذَنَ لَكُمْ إِلَىٰ طَعَامٍ غَيْرَ نَاظِرِينَ إِنَاهُ وَلَٰكِنْ إِذَا دُعِيتُمْ فَادْخُلُوا فَإِذَا طَعِمْتُمْ فَانتَشِرُوا وَلَا مُسْتَأْنِسِينَ لِحَدِيثٍ ۚ إِنَّ ذَٰلِكُمْ كَانَ يُؤْذِي النَّبِيَّ فَيَسْتَحْيِي مِنكُمْ ۖ وَاللَّهُ لَا يَسْتَحْيِي مِنَ الْحَقِّ ۚ وَإِذَا سَأَلْتُمُوهُنَّ مَتَاعًا فَاسْأَلُوهُنَّ مِن وَرَاءِ حِجَابٍ ۚ ذَٰلِكُمْ أَطْهَرُ لِقُلُوبِكُمْ وَقُلُوبِهِنَّ ۚ وَمَا كَانَ لَكُمْ أَن تُؤْذُوا رَسُولَ اللَّهِ وَلَا أَن تَنكِحُوا أَزْوَاجَهُ مِن بَعْدِهِ أَبَدًا ۚ إِنَّ ذَٰلِكُمْ كَانَ عِندَ اللَّهِ عَظِيمًا ﴿٥٣﴾

54. විශ්වාසිතයිනි! නුඹලා භෝජන සංග්‍රහයක් සඳහා ඇරයුම් කරන ලද්දේ නම් මිස වක්තෘවරයාණන්ගේ නිවෙස් වලට ඇතුළු නොවනු. එයද ආහාර පිසීම බලාපොරොත්තු වන්නන්ව නොවිය යුතුය. නමුත් නුඹලා කැඳවනු ලැබූ විට ඇතුළු වනු. එසේම නුඹලා අනුභව කර අවසන් වූ විට එහි කතාබසෙහි නොයෙදී විසිර යනු. එය වක්තෘවරයාණන්ට අපහසුවක් ගෙන දෙන්නේය. එසේම නුඹලාගෙන් (ඉවත් වී යන ලෙස ඉල්ලීමට) ඔහු පැකිලෙනු ඇත. නමුත් සත්‍යය (පැවසීමට) අල්ලාහ් නොපැකිලෙනු ඇත. තවද නුඹලා ඔවුන්ගෙන් (වක්තෘවරයාණන්ගේ භාර්යයාවන්ගෙන්) යමක් ඉල්ලන විටදී තිරයක් පිටුපස සිට ඔවුන්ගෙන් ඉල්ලනු. මෙය නුඹලාගේ හදවත් වලටද ඔවුන්ගේ හදවත් වලටද වඩාත් පිවිතුරුය. තවද අල්ලාහ්ගේ දූතයාණන්ට අපහසුතාවයක් ඇති කිරීම නුඹලාට උචිත නොවේ. තවද ඔහුගෙන් පසුව ඔහුගේ භාර්යයාවන්ව විවාහ කර ගැනීම නුඹලා කිසිසේත් නොකළ යුතුය. ඇත්තෙන්ම එය අල්ලාහ් අභියස බරපතල නපුරකි.

إِن تُبْدُوا شَيْئًا أَوْ تُخْفُوهُ فَإِنَّ اللَّهَ كَانَ بِكُلِّ شَيْءٍ عَلِيمًا ﴿٥٤﴾

55. නුඹලා යම් දෙයක් හෙළි කරන්නේද නැතහොත් එය සඟවන්නේද අල්ලාහ් සියළු දේ මැනැවින් දන්නේය.

لَّا جُنَاحَ عَلَيْهِنَّ فِي آبَائِهِنَّ وَلَا أَبْنَائِهِنَّ وَلَا إِخْوَانِهِنَّ وَلَا أَبْنَاءِ إِخْوَانِهِنَّ وَلَا أَبْنَاءِ أَخَوَاتِهِنَّ وَلَا نِسَائِهِنَّ وَلَا مَا

56. (වක්තෘවරයාගේ භාර්යයාවන් වන) ඔවුන්ට, ඔවුන්ගේ පියවරුන්වද ඔවුන්ගේ පුතුන්වද ඔවුන්ගේ සහෝදරයන්වද ඔවුන්ගේ සහෝදරයන්ගේ පුතුන්වද ඔවුන්ගේ සහෝදරියන්ගේ පුතුන්වද ඔවුන්ගේ (විශ්වාසිත) ස්ත්‍රීන්වද ඔවුන්ගේ වහල්

مَلَكَتْ أَيْمَانُهُنَّ ۚ وَاتَّقِينَ اللَّهَ ۚ إِنَّ اللَّهَ كَانَ عَلَىٰ كُلِّ شَيْءٍ شَهِيدًا ﴿٥٦﴾

ස්ත්‍රීන්වද තිරයෙන් තොරව හමුවීම කිසිම දොසක් නැත. තවද (එම්බල වක්තෘවරයාණන්ගේ භාර්යයාවනි!) අල්ලාහ්ට බිය බැතිමත් වනු. සැබැවින්ම අල්ලාහ් සියළු දේ කෙරෙහි සාක්ෂිකරු වේ.

إِنَّ اللَّهَ وَمَلَائِكَتَهُ يُصَلُّونَ عَلَى النَّبِيِّ ۚ يَا أَيُّهَا الَّذِينَ آمَنُوا صَلُّوا عَلَيْهِ وَسَلِّمُوا تَسْلِيمًا ﴿٥٧﴾

57. නියතවශයෙන්ම අල්ලාහ් වක්තෘවරයාණන්ට ආශිර්වාද කරන්නේය. එමෙන්ම ඔහුගේ සුරදූතයින්ද (නියතවශයෙන්ම ඔහුට ආශිර්වාදය සඳහා ප්‍රාර්ථනා කරමින් සිටින්නෝය). එම්බල විශ්වාසිතයිනි! නුඹලාද ඔහුට ආශිර්වාදය සහ සාමය අත්වේවායි අයැදිමින් සිටිනු.

إِنَّ الَّذِينَ يُؤْذُونَ اللَّهَ وَرَسُولَهُ لَعَنَهُمُ اللَّهُ فِي الدُّنْيَا وَالْآخِرَةِ وَأَعَدَّ لَهُمْ عَذَابًا مُهِينًا ﴿٥٨﴾

58. සැබැවින්ම අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට පීඩා ගෙනදෙන්නන් ගත්කල ඔවුනට අල්ලාහ් මෙලොවෙහි දීද පරලොවෙහිදීද ශාප කර ඇත්තේය. තවද ඔවුන් සඳහා නින්දිත දඬුවමක්ද පිළියෙල කර ඇත්තේය.

وَالَّذِينَ يُؤْذُونَ الْمُؤْمِنِينَ وَالْمُؤْمِنَاتِ بِغَيْرِ مَا اكْتَسَبُوا فَقَدِ احْتَمَلُوا بُهْتَانًا وَإِثْمًا مُبِينًا ﴿٥٩﴾

59. තවද විශ්වාසිත පුරුෂයින්ටද විශ්වාසිත ස්ත්‍රීන්ටද ඔවුන් (වැරදි) නොකළ දෙයට පීඩා ගෙනදෙන්නන් ගත්කල ඔවුන් බොරු චෝදනාවේ (වරද) මෙන්ම ප්‍රකට පාපයද උසුලන්නෝය.

يَا أَيُّهَا النَّبِيُّ قُلْ لِأَزْوَاجِكَ وَبَنَاتِكَ وَنِسَاءِ الْمُؤْمِنِينَ يُدْنِينَ عَلَيْهِنَّ مِنْ جَلَابِيبِهِنَّ ۚ ذَٰلِكَ أَدْنَىٰ أَنْ يُعْرَفْنَ فَلَا يُؤْذَيْنَ ۗ وَكَانَ اللَّهُ غَفُورًا رَحِيمًا ﴿٦٠﴾

60. එම්බල වක්තෘවරයාණෙනි! ඔබගේ භාර්යයාවන්ටද ඔබගේ දියණියන්ටද විශ්වාසිතයින්ගේ ස්ත්‍රීන්ටද ඔවුන්ගේ සළුව (ඔවුන්ගේ හිස් පටන් ඔවුන්ගේ උරහිස තෙක්) ඔවුන් මත දමා ගන්නා ලෙස පවසන්න. එය ඔවුන් හඳුනාගනු ලබන්නටත් හිංසා පීඩා නොකරනු ලබන්නටත් වඩා උචිතය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

لَئِنْ لَمْ يَنْتَهِ الْمُنَافِقُونَ وَالَّذِينَ فِي

61. කුහකයින්ද තම හදවත්හි රෝගය ඇති අයද පදනම් රහිතව

قُلُوبِهِم مَّرَضٌ وَالْمُرْجِفُونَ فِي الْمَدِينَةِ لَنُغْرِيَنَّكَ بِهِمْ ثُمَّ لَا يُجَاوِرُونَكَ فِيهَا إِلَّا قَلِيلًا ﴿٦١﴾

නගරයෙහි කටකථා පතුරුවන අයද වැළකී නොසිටින්නේ නම් නියතවශයෙන්ම අපි ඔවුන්ට එරෙහිව ඔබව නගා සිටුවන්නෙමු. පසුව ඔවුන් ටික කලකට මිස ඔබගේ අසල්වැසියන් ලෙස නොසිටිනු ඇත.

معانقة ١٢ عند المتأخرين

مَّلْعُونِينَ ۖ أَيْنَمَا ثُقِفُوا أُخِذُوا وَقُتِّلُوا تَقْتِيلًا ﴿٦٢﴾

62. (පසුව ඔවුන්) ශාප කරනු ලබන්නෝය. කොතැනක හෝ ඔවුන් දැකගනු ලැබූ විට ඔවුන් ග්‍රහණය කරනු ලැබිය යුතුය. තවද දැඩිලෙස ඝාතනය කරනු ලැබිය යුතුය.

سُنَّةَ اللَّهِ فِي الَّذِينَ خَلَوْا مِن قَبْلُ ۖ وَلَن تَجِدَ لِسُنَّةِ اللَّهِ تَبْدِيلًا ﴿٦٣﴾

63. මීට පෙර සිටි අය සම්බන්ධව අල්ලාහ්ගේ පිළිවෙත වූයේ මෙයමය. තවද ඔබ අල්ලාහ්ගේ පිළිවෙතෙහි කිසිදු වෙනසක් කිසිසේත් නොදකින්නෙහිය.

يَسْأَلُكَ النَّاسُ عَنِ السَّاعَةِ ۖ قُلْ إِنَّمَا عِلْمُهَا عِندَ اللَّهِ ۚ وَمَا يُدْرِيكَ لَعَلَّ السَّاعَةَ تَكُونُ قَرِيبًا ﴿٦٤﴾

64. මිනිසුන් (අවසාන) හෝරාව සම්බන්ධව ඔබගෙන් අසති. 'ඒ ගැන දැනුම අල්ලාහ් වෙත පමණී'යි පවසන්න. තවද එම හෝරාව ආසන්න වී ඇති බවට ඔබට දැනගැනීමට සලස්වන්නේ කුමක්ද?

إِنَّ اللَّهَ لَعَنَ الْكَافِرِينَ وَأَعَدَّ لَهُمْ سَعِيرًا ﴿٦٥﴾

65. අල්ලාහ් නියතවශයෙන්ම අවිශ්වාසීතයින් හට ශාප කර ඇත. තවද ඔවුනට දැවෙන ගින්නක් පිළියෙල කර ඇත.

خَالِدِينَ فِيهَا أَبَدًا ۖ لَّا يَجِدُونَ وَلِيًّا وَلَا نَصِيرًا ﴿٦٦﴾

66. ඔවුන් එහි දිගුකල් වාසය කරනු ඇත. ඔවුන් (එහි) කිසිම මිතුරෙකු හෝ උදව්කරුවෙකු නොදකිනු ඇත.

يَوْمَ تُقَلَّبُ وُجُوهُهُمْ فِي النَّارِ يَقُولُونَ يَا لَيْتَنَا أَطَعْنَا اللَّهَ وَأَطَعْنَا الرَّسُولَا ﴿٦٧﴾

67. ඔවුන්ගේ මුහුණු ගින්නෙහි උඩුයටිකුරු කරනු ලබන දිනයේදී ඔවුන්, 'අහෝ! අපි අල්ලාහ්ට අවනත වූයේ නම්! දූතයාණන්ටද අවනත වූයේ නම්!' යැයි කියන්නෝය.

وَقَالُوا رَبَّنَا إِنَّا أَطَعْنَا سَادَتَنَا وَكُبَرَاءَنَا فَأَضَلُّونَا السَّبِيلَا ﴿٦٨﴾

68. තවද ඔවුන් 'අපගේ අධිපතියාණෙනි! අපි අපගේ ප්‍රධානීන්ටද අපගේ ශ්‍රේෂ්ඨයින්ටද අවනත වූයෙමු. තවද ඔවුන් අපව යහමගින් වැරදි මගට යොමු කළෝය'යි පවසන්නෝය.

رَبَّنَآ اٰتِهِمْ ضِعْفَيْنِ مِنَ الْعَذَابِ وَالْعَنْهُمْ لَعْنًا كَبِيْرًا ﴿٦٩﴾

69. 'අපගේ අධිපතියාණෙනි! ඔවුන්ට දඬුවමින් දෙගුණයක් දෙනු මැනව. තවද ඔවුන් මත මහත් ශාපයකින් ශාප කරනු මැනව'.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَكُوْنُوْا كَالَّذِيْنَ اٰذَوْا مُوْسٰى فَبَرَّاَهُ اللّٰهُ مِمَّا قَالُوْا ؕ وَكَانَ عِنْدَ اللّٰهِ وَجِيْهًا ﴿٧٠﴾

70. එම්බල විශ්වාසිතයිනි! මූසාට අපහාස කර පීඩාවට පත් කළ අය මෙන් නොවනු. ඔවුන් (ඔහු ගැන) පැවසූ දෙයින් අල්ලාහ් ඔහුව නිදොස් කළේය. තවද ඔහු අල්ලාහ් අභියස ගෞරවාන්විත විය.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اتَّقُوا اللّٰهَ وَقُوْلُوْا قَوْلًا سَدِيْدًا ﴿٧١﴾

71. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ට බිය බැතිමත් වනු. තවද සෘජු වදනින් පවසනු.

يُّصْلِحْ لَكُمْ اَعْمَالَكُمْ وَيَغْفِرْ لَكُمْ ذُنُوْبَكُمْ ؕ وَمَنْ يُّطِعِ اللّٰهَ وَرَسُوْلَهٗ فَقَدْ فَازَ فَوْزًا عَظِيْمًا ﴿٧٢﴾

72. ඔහු නුඹලාට නුඹලාගේ ක්‍රියාවන් නිවැරදි කරන්නේය. තවද නුඹලාගේ පව් ක්ෂමා කරන්නේය. තවද කවුරුන් හෝ අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට අවනත වන්නේද නියතවශයෙන්ම ඔහු අතිමහත් ජයග්‍රහණයක් ලබාගන්නේය.

اِنَّا عَرَضْنَا الْاَمَانَةَ عَلَى السَّمٰوٰتِ وَالْاَرْضِ وَالْجِبَالِ فَاَبَيْنَ اَنْ يَّحْمِلْنَهَا وَاَشْفَقْنَ مِنْهَا وَحَمَلَهَا الْاِنْسَانُ ؕ اِنَّهٗ كَانَ ظَلُوْمًا جَهُوْلًا ﴿٧٣﴾

73. සැබැවින්ම අපි විශ්වාසය මත දෙන දේ අහස් පොළොව සහ කඳු වෙත භාර කළෙමු. නමුත් ඒවා එය ඉසිලීමට ප්‍රතික්ෂේප කළේය. තවද ඒවා එය කෙරෙහි බියට පත් විය. නමුත් මිනිසා එය ඉසිලිය. ඇත්තෙන්ම ඔහු (තමන්ටම) අසාධාරණය කරන්නෙක් මෙන්ම (එහි ඵලවිපාකය ගැන) නොසලකන්නෙක් විය.

لِّيُعَذِّبَ اللّٰهُ الْمُنٰفِقِيْنَ وَالْمُنٰفِقٰتِ وَالْمُشْرِكِيْنَ وَالْمُشْرِكٰتِ وَيَتُوْبَ اللّٰهُ عَلَى الْمُؤْمِنِيْنَ وَالْمُؤْمِنٰتِ ؕ وَكَانَ اللّٰهُ غَفُوْرًا رَّحِيْمًا ﴿٧٤﴾

74. (එහි ප්‍රතිඵලය නම්) අල්ලාහ් කුහක පුරුෂයින්ටද කුහක ස්ත්‍රීන්ටද දෙවියන්ට සමාන තබන පුරුෂයින්ටද දෙවියන්ට සමාන තබන ස්ත්‍රීන්ටද දඬුවම් කරනු පිණිසත් විශ්වාසිත පුරුෂයින් වෙතද විශ්වාසිත ස්ත්‍රීන් වෙතද අල්ලාහ් දයාවෙන් යුතුව හැරෙනු පිණිසත්ය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.



සබා
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡحَمۡدُ لِلّٰهِ الَّذِىۡ لَهٗ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الۡاَرۡضِ وَ لَهُ الۡحَمۡدُ فِى الۡاٰخِرَةِ ؕ وَهُوَ الۡحَكِيۡمُ الۡخَبِيۡرُ ②

2. අහසෙහි ඇති සියළු දේ මෙන්ම පොළොවෙහි ඇති සියළු දේ කවරෙකුට අයත් වන්නේද එම අල්ලාහ්ටම සියළු ප්‍රශංසා අයත්ය. තවද පරලොවෙහිදීද සියළු ප්‍රසංශා ඔහුටමය. තවද ඔහු ප්‍රඥාසම්පන්නය, සියල්ලෙහි විමසිලිමත්ය.

يَعۡلَمُ مَا يَلِجُ فِى الۡاَرۡضِ وَمَا يَخۡرُجُ مِنۡهَا وَمَا يَنۡزِلُ مِنَ السَّمَآءِ وَمَا يَعۡرُجُ فِيۡهَا ؕ وَهُوَ الرَّحِيۡمُ الۡغَفُوۡرُ ③

3. පොළොව තුලට ඇතුළු වන දේද එයින් පිටවන දේද තවද අහසින් පහළ වන දේද ඒ වෙතට නැගෙන දේද ඔහු දන්නේය. තවද ඔහු පරම දයාබරය, අතිශයින්ම ක්ෂමාන්විතය.

وَقَالَ الَّذِيۡنَ كَفَرُوۡا لَا تَاۡتِيۡنَا السَّاعَةُ ؕ قُلۡ بَلٰى وَرَبِّىۡ لَتَاۡتِيَنَّكُمۡ ۙ عٰلِمِ الۡغَيۡبِ ۚ لَا يَعۡزُبُ عَنۡهُ مِثۡقَالُ ذَرَّةٍ فِى السَّمٰوٰتِ وَلَا فِى الۡاَرۡضِ وَلَاۤ اَصۡغَرُ مِنۡ ذٰلِكَ وَلَاۤ اَكۡبَرُ اِلَّا فِىۡ كِتٰبٍ مُّبِيۡنٍ ④

4. තවද අවිශ්වාස කළ අය 'අප කෙරෙහි එම හෝරාව කිසිවිටෙකත් නොපැමිණෙන්නේමයැ'යි පවසති. පවසන්න, 'නොඑසේය, අදෘෂ්‍යමාන දේ දන්නා මාගේ අධිපතියාණන් සාක්කි! එය නියතවශයෙන්ම නුඹලා කෙරෙහි පැමිණෙන්නේමය. අහසෙහිද පොළොවෙහිද ඇති අණුවක තරම් බරක් හෝ ඊටත් වඩා කුඩා මෙන්ම විශාල හෝ කිසිවක් වුවද ඔහුගෙන් ගිලිහී නොයන්නේය. නමුත් (මේ සියල්ල) පැහැදිලි ග්‍රන්ථයක (සටහන් වී ඇත.)'

لِّيَجۡزِىَ الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ ؕ اُولٰٓـئِكَ لَهُمۡ مَّغۡفِرَةٌ وَّرِزۡقٌ كَرِيۡمٌ ⑤

5. 'ඔහු විශ්වාස කොට යහපත් ක්‍රියා කළ අය හට තිළිණය දෙනු පිණිස වේ. ක්ෂමාවද, ගෞරවාන්විත ජීවනෝපායද ලබන්නෝ ඔවුන්මය'.

وَالَّذِيۡنَ سَعَوۡ فِىۡۤ اٰيٰتِنَا مُعٰجِزِيۡنَ اُولٰٓـئِكَ

6. තවද (අපගේ සැලසුම්) නිෂ්ඵල කරන්නට පතමින් අපගේ සළකුණු වලට එරෙහිව වෑයම් දරන අය

لَهُمْ عَذَابٌ مِّنْ رِّجْزٍ اَلِيْمٌ ۝٦

ගත්කල, වේදනීය දඬුවමින් දුක් විඳීමක් ලැබෙනුයේ ඔවුන්ටමය.

وَيَرَى الَّذِيْنَ اُوْتُوا الْعِلْمَ الَّذِىْٓ اُنْزِلَ اِلَيْكَ مِنْ رَّبِّكَ هُوَ الْحَقَّ ۙ وَيَهْدِىْٓ اِلٰى صِرَاطِ الْعَزِيْزِ الْحَمِيْدِ ۝٧

7. තවද දැනුම දෙනු ලැබූ අය, ඔබගේ අධිපතියාණන්ගෙන් ඔබ වෙත පහළ කරන ලද දේ සත්‍ය යැයිද එය බලසම්පන්න වූ මෙන්ම ප්‍රශංසා හිමි වෙත මග පෙන්වන්නේ යැයිද දැකගන්නෝය.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا هَلْ نَدُلُّكُمْ عَلٰى رَجُلٍ يُّنَبِّئُكُمْ اِذَا مُزِّقْتُمْ كُلَّ مُمَزَّقٍ ۙ اِنَّكُمْ لَفِىْ خَلْقٍ جَدِيْدٍ ۝٨

8. තවද අවිශ්වාස කළ අය, 'නුඹලා සුනුවිසුණු වී ගිය පසු නුඹලා නව මැවීමක් ලෙස (නැගිටවනු) ලබන බව නුඹලාට කියාදෙන මිනිසෙකුව අප නුඹලාට පෙන්වා දෙන්නදැ?'යි පවසති.

اَفْتَرٰى عَلَى اللّٰهِ كَذِبًا اَمْ بِهٖ جِنَّةٌ ۗ بَلِ الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِالْاٰخِرَةِ فِى الْعَذَابِ وَالضَّلٰلِ الْبَعِيْدِ ۝٩

9. 'ඔහු අල්ලාහ්ට එරෙහිව බොරුවක් ගොතා ඇත්තේද නැතහොත් ඔහුට උමතුව වැළඳී ඇත්තේද?' නොඑසේය, පරලොව ගැන විශ්වාස නොකරන අය දඬුවමින් පෙළෙන්නෝය. තවද නොමගෙහි ඉතා ඈතට ගොස්ය.

اَفَلَمْ يَرَوْا اِلٰى مَا بَيْنَ اَيْدِيْهِمْ وَمَا خَلْفَهُمْ مِّنَ السَّمَآءِ وَالْاَرْضِ ۗ اِنْ نَّشَاْ نَخْسِفْ بِهِمُ الْاَرْضَ اَوْ نُسْقِطْ عَلَيْهِمْ كِسَفًا مِّنَ السَّمَآءِ ۗ اِنَّ فِىْ ذٰلِكَ لَاٰيَةً لِّكُلِّ عَبْدٍ مُّنِيْبٍ ۝١٠

10. අහස් සහ පොළොව දෙස ඔවුන්ට ඉදිරියෙන්ද ඔවුන්ට පසුපසින්ද තිබෙන දේ ඔවුන් නොබලන්නෝද? අපි අභිමත වුයේ නම්, අපට ඔවුන්ව පොළොව තුළට ගිල්වන්නටත් නැතහොත් අහසින් ඇතැම් කැබලි ඔවුන් මත කඩා වැටෙන්නටත් සලස්වන්නට තිබුණි. සැබැවින්ම පසුතැවිලි වන දාසයින් සියල්ලන්ට එහි සළකුණු ඇත.

وَلَقَدْ اٰتَيْنَا دَاوٗدَ مِنَّا فَضْلًا ۗ يٰجِبَالُ اَوِّبِىْ مَعَهٗ وَالطَّيْرَ ۚ وَاَلَنَّا لَهُ الْحَدِيْدَ ۝١١

11. තවද නියතවශයෙන්ම අපි දාවුද්ට අප වෙතින්ම වරප්‍රසාදය පිරිනැමුවෙමු. 'එම්බා පර්වත! ඔහුත් සමග පූර්ණ අවනත භාවයෙන් යුතුව දෙවියන් වෙතට හැරෙනු. එම්බල පක්ෂීනි! (නුඹලාද)'. තවද අප ඔහු වෙනුවෙන් යකඩ මෙලෙක් කළේ (මෙසේ පවසමින්ය).

12. 'ඔබ මුළුමනින්ම වැසෙන අන්දමින් සන්නාහයන් තනන්න. තවද නියමිත ප්‍රමාණයට පුරුක් තබාගන්න. තවද ධාර්මිෂ්ඨව ක්‍රියා කරන්න.' නියත වශයෙන්ම නුඹලා කරන සියල්ල මම දකින්නෙමි'.

أَنِ اعْمَلْ سٰبِغٰتٍ وَّقَدِّرْ فِى السَّرْدِ وَاعْمَلُوْا صَالِحًا ۗ اِنِّىْ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ﴿١٢﴾

13. තවද (අපි) සුලෛමාන් හට සුළඟ (සේවය පිණිස යෙදෙව්වෙමු). එහි උදේ ගමන මාසයකට සමාන විය. තවද එහි සවස් ගමන මාසයකට සමාන විය. තවද අපි උණු කළ තඹ උල්පතක් ඔහු වෙනුවෙන් ගලායෑමට සැලැස්වූයෙමු. තවද ජින්වරුන්ගෙන් ඇතැම් අයව තම අධිපතියාණන්ගේ විධානයෙන් ඔහු යටතේ සේවය කිරීමට (සැලැස්වූයෙමු). තවද ඔවුන්ගෙන් කිසිවෙක් හෝ වේවා අපගේ විධානයෙන් පිටුපා යන්නේද අපි ඔහුට දැවෙන ගින්නේ දඬුවම විඳින්නට සලස්වන්නෙමු(යි අපි පැවසුවෙමු)

وَلِسُلَيْمٰنَ الرِّيْحَ غُدُوُّهَا شَهْرٌ وَّرَوَاحُهَا شَهْرٌ ۚ وَاَسَلْنَا لَهٗ عَيْنَ الْقِطْرِ ۗ وَمِنَ الْجِنِّ مَنْ يَّعْمَلُ بَيْنَ يَدَيْهِ بِاِذْنِ رَبِّهٖ ۗ وَمَنْ يَّزِغْ مِنْهُمْ عَنْ اَمْرِنَا نُذِقْهُ مِنْ عَذَابِ السَّعِيْرِ ﴿١٣﴾

14. ඔවුන් ඔහු වෙනුවෙන් ඔහු ප්‍රිය කළ සුවිසල් මැදුරුද සිතුවම්ද ජල තටාකයන් වැනි බඳුන්ද එමෙන්ම එතැන්හි සවිකර ඇති විශාල පිසින බඳුන්ද තනා දුන්නෝය. 'එම්බල දාවුද්ගේ නිවැසියෙනි! නුඹලා කෘතඥ වෙමින් ක්‍රියා කරනු'. නමුත් මාගේ දාසයින්ගෙන් කෘතඥවන්නේ ස්වල්ප දෙනෙක්ය.

يَعْمَلُوْنَ لَهٗ مَا يَشَآءُ مِنْ مَّحَارِيْبَ وَتَمَاثِيْلَ وَجِفَانٍ كَالْجَوَابِ وَقُدُوْرٍ رّٰسِيٰتٍ ۗ اِعْمَلُوْٓا اٰلَ دَاوٗدَ شُكْرًا ۗ وَقَلِيْلٌ مِّنْ عِبَادِيَ الشَّكُوْرُ ﴿١٤﴾

*15. පසුව අප ඔහුගේ (සුලෛමාන්ගේ) මරණය නියම කළ කල්හි ඔහුගේ සැරයටිය (ඔහුගේ අධ්‍යාත්මික රාජ්‍යය) කා දමමින් සිටි පොළොවේ පණුවෙකු (ඔහුගේ නියෝජනයට සුදුසු නොවූ පුත්‍රයා) මිස අන් කිසිවෙකුත් ඔහු මරණයට පත් වූ බවට ඔවුන්ට දැනුවත් නොකළේය. එබැවින් එය (රාජ්‍යය පරිපාලනය)

فَلَمَّا قَضَيْنَا عَلَيْهِ الْمَوْتَ مَا دَلَّهُمْ عَلٰى مَوْتِهٖٓ اِلَّا دَآبَّةُ الْاَرْضِ تَاْكُلُ مِنْسَاَتَهٗ ۚ فَلَمَّا خَرَّ تَبَيَّنَتِ الْجِنُّ اَنْ لَّوْ كَانُوْا يَعْلَمُوْنَ الْغَيْبَ مَا لَبِثُوْا فِى الْعَذَابِ

*සටහන. 15: 'දාබ්බා' යන වචනය සියළු වර්ගයේ සත්ව ජිවීන් වලට යෙදේ. එබැවින් පොළොවේ පණුවා යන්නෙහි අර්ථය සෘජුව නොගත යුතු අතර උපමාවක් ලෙස ගත යුතුය. මෙමගින් මෙහිදී සුලෛමාන්ගේ පුත්‍රයා පෙන්නුම් කරයි. ඔහුගේ පියාගේ අධ්‍යාත්මික ගුණාංගයන් හෝ ඔහුව විශිෂ්ඨ ලෙස හුවා දැක්වූ ඔහුගේ රාජ්‍ය තන්ත්‍රය හෝ ඔහුගේ පුත්‍රයාට උරුම වූයේ නැත. ඔහුගේ පාලන කාලය තුළදී සුලෛමාන් විසින් යටත් කරගත් බලගතු

ඇ෴ හැලුනු විට ජින්වරුන්, ඔවුන් අදෘශ්‍යමාන දේ දැන සිටියා නම්, ඔවුන් නින්දිත දඬුවමකට පත් නොවන බව පැහැදිලිව වටහාගත්හ.

الْمُهِينِ ﴿١٥﴾

16. ඇත්තෙන්ම සබා(හි ජනයා) හට ඔවුන්ගේ මව්බිමෙහි සළකුණක් විය. දකුණෙහිද වමෙහිද උයන් දෙකක් විය. (එම්බල සබාහි ජනයිනි!) නුඹලාගේ අධිපතියාණන්ගෙන් වන ජීවනෝපායෙන් අනුභව කරනු. තවද ඔහුට කෘතඥවනු. (නුඹලාගේ) නගරය අති සුන්දරය. එමෙන්ම (නුඹලාගේ) අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය.

لَقَدْ كَانَ لِسَبَإٍ فِي مَسْكَنِهِمْ آيَةٌ ۖ جَنَّتَانِ عَن يَمِينٍ وَشِمَالٍ ۖ كُلُوا مِن رِّزْقِ رَبِّكُمْ وَاشْكُرُوا لَهُ ۚ بَلْدَةٌ طَيِّبَةٌ وَرَبٌّ غَفُورٌ ﴿١٦﴾

17. එහෙත් ඔවුහු පිටුපෑහ. එමනිසා අපි ඔවුනට එරෙහිව වේල්ල බිඳමින් බිහිසුණු ජල ගැල්මක් එව්වෙමු. තවද අපි ඔවුන්ගේ උයන් දෙක වෙනුවට තිත්ත පළතුරුද ඇඹුල් මිදෙල්ල සහ මසං ගස් කිහිපයක්ද සහිත උයන් දෙකක් බවට පත් කළෙමු.

فَأَعْرَضُوا فَأَرْسَلْنَا عَلَيْهِمْ سَيْلَ الْعَرِمِ وَبَدَّلْنَاهُم بِجَنَّتَيْهِمْ جَنَّتَيْنِ ذَوَاتَيْ أُكُلٍ خَمْطٍ وَأَثْلٍ وَشَيْءٍ مِّن سِدْرٍ قَلِيلٍ ﴿١٧﴾

18. ඔවුන් කළගුණ නොසැළකූ බැවින් අපි ඔවුනට දුන් ප්‍රතිවිපාකය එය වේ. අකෘතඥ අයට මිස අපි කිසිවෙකුටත් (මෙලෙස) ප්‍රතිවිපාක නොදෙන්නෙමු.

ذَٰلِكَ جَزَيْنَاهُم بِمَا كَفَرُوا ۖ وَهَلْ نُجَازِي إِلَّا الْكَفُورَ ﴿١٨﴾

19. තවද අපි ඔවුන් අතර සහ අප ආශිර්වාද කළාවූ නගරයන් අතර පැහැදිලිව පෙනෙන්නා වූ නගරයන් ඇති කළෙමු. තවද ඒවා අතර අපි පහසු ගමන් අදියරයන් නියම කළෙමු. 'ඒවායෙහි රාත්‍රිය සහ දවාලයේ සුරක්ෂිතව ගමන් කරනු'(යි පැවසුවෙමු).

وَجَعَلْنَا بَيْنَهُمْ وَبَيْنَ الْقُرَى الَّتِي بَارَكْنَا فِيهَا قُرًى ظَاهِرَةً وَقَدَّرْنَا فِيهَا السَّيْرَ ۖ سِيرُوا فِيهَا لَيَالِيَ وَأَيَّامًا آمِنِينَ ﴿١٩﴾

20. නමුත් ඔවුහු (අකෘතඥ වූ විට) 'අපගේ අධිපතියාණෙනි! අපගේ ගමන් (අදියරයන්) අතර දුර ප්‍රමාණය දිගු කරත්වා'යි පැවසූහ. තවද ඔවුහු තමන්ටම වැරදි

فَقَالُوا رَبَّنَا بَاعِدْ بَيْنَ أَسْفَارِنَا وَظَلَمُوا أَنفُسَهُمْ فَجَعَلْنَاهُمْ أَحَادِيثَ وَمَزَّقْنَاهُمْ

නායකයින්ට (ජින්වරුන්ට) ඔහු දැන් මරණයට පත් වී ඇති බවට ඔවුන්ට සෙමින් සෙමින් දැනෙන්නට ලැබුණි. එබැවින් ඔවුන් මෙම බලවත් රාජධානියෙහි බෙදීම් ඇති කිරීම සඳහා කලහ කිරීමට සමත් වූහ.

كُلَّ مُمَزَّقٍ ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّكُلِّ صَبَّارٍ شَكُورٍ ﴿٢٠﴾

කරගත්හ. එබැවින් අපි ඔවුන්ව පැරණි කතාන්තර බවට පත් කළෙමු. තවද අපි ඔවුන්ව සහමුලින්ම සුනුවිසුණු කර විසිරී යාමට සැලැස්වූවෙමු. නියතවශයෙන්ම ඉවසිලිවන්ත (සහ) කෘතඥ වූ සෑම අයටම එහි සළකුණු ඇත.

وَلَقَدْ صَدَّقَ عَلَيْهِمْ إِبْلِيسُ ظَنَّهُۥ فَٱتَّبَعُوهُ إِلَّا فَرِيقًا مِّنَ ٱلْمُؤْمِنِينَ ﴿٢١﴾

21. තවද ඉබ්ලීස් ඔවුන් සම්බන්ධව ඔහුගේ මතය සත්‍යය බව තහවුරු කළේය. එමනිසා විශ්වාසිතයින්ගෙන් පිරිසක් හැර ඔවුන් (සියල්ලන්ම) ඔහුව අනුගමනය කළහ.

وَمَا كَانَ لَهُۥ عَلَيْهِم مِّن سُلْطَٰنٍ إِلَّا لِنَعْلَمَ مَن يُؤْمِنُ بِٱلْءَاخِرَةِ مِمَّنْ هُوَ مِنْهَا فِى شَكٍّ ۗ وَرَبُّكَ عَلَىٰ كُلِّ شَىْءٍ حَفِيظٌ ﴿٢٢﴾

22. ඔහුට ඔවුන් කෙරෙහි කිසිදු බලයක් නොතිබුණි. එහෙත් පරලොව කෙරෙහි විශ්වාස කළ අයව එය පිළිබඳව සැකයෙහි වූ අයගෙන් අප වෙන්කර හඳුනාගැනීමට (එලෙස සිදු විය). තවද ඔබගේ අධිපතියාණන් සියලු දේ කෙරෙහි සුපරීක්ෂාකාරීය.

قُلِ ٱدْعُوا۟ ٱلَّذِينَ زَعَمْتُم مِّن دُونِ ٱللَّهِ ۖ لَا يَمْلِكُونَ مِثْقَالَ ذَرَّةٍ فِى ٱلسَّمَٰوَٰتِ وَلَا فِى ٱلْأَرْضِ وَمَا لَهُمْ فِيهِمَا مِن شِرْكٍ وَمَا لَهُۥ مِنْهُم مِّن ظَهِيرٍ ﴿٢٣﴾

23. පවසන්න, 'අල්ලාහ් හැර නුඹලා (දෙවියන් යැයි) අනුමාන කරන අයව කැඳවනු. ඔවුන් අහස්හිද පොළොවෙහිද අණුවක් තරම් බරක්වත් පාලනය කරන්නේ නැත. එමෙන්ම ඒ දෙකෙහි කිසිදු කොටසක්ද ඔවුන්ට නැත. තවද ඔහුට ඔවුනතරින් කිසිදු උදව්කරුවෙකුද නැත'.

وَلَا تَنفَعُ ٱلشَّفَٰعَةُ عِندَهُۥٓ إِلَّا لِمَنْ أَذِنَ لَهُۥ ۚ حَتَّىٰٓ إِذَا فُزِّعَ عَن قُلُوبِهِمْ قَالُوا۟ مَاذَا قَالَ رَبُّكُمْ ۖ قَالُوا۟ ٱلْحَقَّ ۖ وَهُوَ ٱلْعَلِىُّ ٱلْكَبِيرُ ﴿٢٤﴾

24. ඔහු කවරෙකුට අවසරය දුන්නේද, හෙතෙම හැර ඔහු අභියස කිසිදු මැදිහත්වීමක් ඵලක් දෙන්නේ නැත. ඔවුන්ගේ හදවත්හි භීතිය පහවී ගිය පසු ඔවුන්, 'නුඹලාගේ අධිපතියාණන් පැවසූ එම දේ කුමක්දැ?'යි අසනු ඇත. එයට ඔවුහු(දූතයින්) 'සත්‍යයැ'යි පිළිතුරු දෙන්නෝය. තවද ඔහු අතියුත්කෘෂ්ටය, අති ශ්‍රේෂ්ඨය.

قُلْ مَن يَرْزُقُكُم مِّنَ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ ۖ قُلِ ٱللَّهُ ۖ وَإِنَّآ أَوْ إِيَّاكُمْ

25. 'අහස් සහ පොළොවෙන් නුඹලාට ජීවනෝපාය සලසන්නේ කවුරුන්දැ?'යි අසන්න. (එයට)

لَعَلٰى هُدًى اَوْ فِيْ ضَلٰلٍ مُّبِيْنٍ ۝٢٥

'අල්ලාහ්යැ'යි පවසන්න. 'තවද හරි මගෙහි හෝ ප්‍රකට වරදෙහි සිටිනුයේ අපිද නුඹලාදැ?'(යි අසන්න).

قُلْ لَّا تُسْـَٔلُوْنَ عَمَّآ اَجْرَمْنَا وَلَا نُسْـَٔلُ عَمَّا تَعْمَلُوْنَ ۝٢٦

26. පවසන්න, 'අපගේ පාපයන් සම්බන්ධයෙන් නුඹලා ප්‍රශ්න නොකරනු ලබන්නෙහුය. තවද නුඹලා කරන දේ පිළිබඳව අපි ප්‍රශ්න නොකරනු ලබන්නෙමු'.

قُلْ يَجْمَعُ بَيْنَنَا رَبُّنَا ثُمَّ يَفْتَحُ بَيْنَنَا بِالْحَقِّ ۗ وَهُوَ الْفَتَّاحُ الْعَلِيْمُ ۝٢٧

27. පවසන්න, 'අපගේ අධිපතියාණන්, අප සියල්ලවම එක්රැස් කරන්නේය. පසුව ඔහු අප අතර සත්‍යයෙන් යුතුව විනිශ්චය කරන්නේය. තවද ඔහු ශ්‍රේෂ්ඨ විනිශ්චයකරුය, සියල්ල දන්නාය'.

قُلْ اَرُوْنِيَ الَّذِيْنَ اَلْحَقْتُمْ بِهٖ شُرَكَآءَ كَلَّا ۗ بَلْ هُوَ اللّٰهُ الْعَزِيْزُ الْحَكِيْمُ ۝٢٨

28. පවසන්න, 'නුඹලා ඔහු සමග හවුල්කරුවන් වශයෙන් එක් කළ අයව මට පෙන්වනු. නොඑසේය! (නුඹලාට එසේ කළ නොහැකිය.) මන්ද, ඔහු අල්ලාහ්ය, බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය'.

وَمَآ اَرْسَلْنٰكَ اِلَّا كَآفَّةً لِّلنَّاسِ بَشِيْرًا وَّنَذِيْرًا وَّلٰكِنَّ اَكْثَرَ النَّاسِ لَا يَعْلَمُوْنَ ۝٢٩

29. තවද සියළු මිනිස් සංහතියටම සුභාරංචි ගෙනෙන්නෙකු ලෙසද අවවාදකරුවෙකු ලෙසද මිස අපි ඔබව නොඑව්වෙමු. නමුත් මිනිසුන්ගෙන් බොහෝ අය නොදනිති.

وَيَقُوْلُوْنَ مَتٰى هٰذَا الْوَعْدُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ۝٣٠

30. තවද ඔවුහු, 'නුඹලා සත්‍යවාදීන් වේ නම්, මෙම පොරොන්දුව (ඉටුවන්නේ) කවදාදැ?'යි කියති.

قُلْ لَّكُمْ مِّيْعَادُ يَوْمٍ لَّا تَسْتَاْخِرُوْنَ عَنْهُ سَاعَةً وَّلَا تَسْتَقْدِمُوْنَ ۝٣١

31. පවසන්න, 'නුඹලාට පොරොන්දු වූ කාලය එක් දිනයක් වේ. එය එක් මොහොතක්වත් පමා කිරීමට නුඹලාට නොහැකිය. එමෙන්ම ඉදිරියට යාමටද නුඹලාට නොහැකිය'.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا لَنْ نُّؤْمِنَ بِهٰذَا الْقُرْاٰنِ وَلَا بِالَّذِيْ بَيْنَ يَدَيْهِ ۗ وَلَوْ تَرٰٓى اِذِ الظّٰلِمُوْنَ مَوْقُوْفُوْنَ عِنْدَ رَبِّهِمْ ۚ

32. තවද අවිශ්වාස කළ අය, 'අපි කිසිවිටෙකත් මෙම කුර්ආනය කෙරෙහි විශ්වාස නොකරමු. එමෙන්ම එයට පෙර ඇති දේ කෙරෙහිද (විශ්වාස) නොකරමු'යි කියති. තවද වරදකරුවන්ව ඔවුන්ගේ

يَرْجِعُ بَعْضُهُمْ إِلَىٰ بَعْضٍ الْقَوْلَ ۚ يَقُولُ الَّذِينَ اسْتُضْعِفُوا لِلَّذِينَ اسْتَكْبَرُوا لَوْلَا أَنتُمْ لَكُنَّا مُؤْمِنِينَ ٣٢

අධිපතියාණන් හමුවේ ඉදිරිපත් කරනු ලැබූ කල්හි, ඔවුන් එකිනෙකා මත දොස් පවරනු ඔබට දැක ගන්නට හැකි වනු ඇත. දුර්වල යැයි සලකනු ලැබූවන්, උඩඟු වූවන් හට, 'නුඹලා නොවූයේ නම්, නියතවශයෙන්ම අප විශ්වාසිතයින් වන්නට තිබුණි'යි පවසනු ඇත.

قَالَ الَّذِينَ اسْتَكْبَرُوا لِلَّذِينَ اسْتُضْعِفُوا أَنَحْنُ صَدَدْنَاكُمْ عَنِ الْهُدَىٰ بَعْدَ إِذْ جَاءَكُم ۖ بَلْ كُنتُم مُّجْرِمِينَ ٣٣

33. උඩඟු වූවන්, දුර්වල යැයි සලකනු ලැබූවන් හට, 'නුඹලා වෙත (යහමග) පැමිණි පසු, යහමගින් නුඹලාව ඉවත් කළේ අපිද? නොඑසේය, වරදකරුවන් වූයේ නුඹලාමයැ'යි කියන්නෝය.

وَقَالَ الَّذِينَ اسْتُضْعِفُوا لِلَّذِينَ اسْتَكْبَرُوا بَلْ مَكْرُ اللَّيْلِ وَالنَّهَارِ إِذْ تَأْمُرُونَنَا أَن نَّكْفُرَ بِاللَّهِ وَنَجْعَلَ لَهُ أَندَادًا ۚ وَأَسَرُّوا النَّدَامَةَ لَمَّا رَأَوُا الْعَذَابَ ۚ وَجَعَلْنَا الْأَغْلَالَ فِي أَعْنَاقِ الَّذِينَ كَفَرُوا ۚ هَلْ يُجْزَوْنَ إِلَّا مَا كَانُوا يَعْمَلُونَ ٣٤

34. තවද දුර්වල යැයි සලකනු ලැබූ අය, උඩඟු වූවන් හට, 'නොඑසේය, නමුත් එය (නුඹලාගේ) රාත්‍රිය සහ දවාලයේ සැලසුමක් විය. එවිට අප අල්ලාහ් කෙරෙහි අවිශ්වාස කරන ලෙසත් අප ඔහුට සමානයන් තබන ලෙසත් නුඹලා අපට අණ කළෙහු'යැයි පවසන්නෝය. තවද ඔවුන් දඬුවම දකින කල්හි, ඔවුන් (තමන්ගේ) ලැජ්ජාව සඟවා ගන්නෝය. තවද අවිශ්වාස කළ අයගේ ගෙලවටා අපි දම්වැල් දමන්නෙමු. ඔවුන් කරමින් සිටි දේට මිස ඔවුන්ට ප්‍රතිවිපාක දෙනු ලබන්නේද?

وَمَا أَرْسَلْنَا فِي قَرْيَةٍ مِّن نَّذِيرٍ إِلَّا قَالَ مُتْرَفُوهَا إِنَّا بِمَا أُرْسِلْتُم بِهِ كَافِرُونَ ٣٥

35. තවද යම්කිසි ජනාවාසයකට එහි ධනවතුන්, 'නියතවශයෙන්ම නුඹලා සමග එවන ලද දේ කෙරෙහි අපි විශ්වාස නොකරමු'යි කීවා මිස අපි කිසිවිටෙකත් අවවාදකරුවෙකු නොයැව්වෙමු.

وَقَالُوا نَحْنُ أَكْثَرُ أَمْوَالًا وَأَوْلَادًا وَمَا نَحْنُ بِمُعَذَّبِينَ ٣٦

36. තවද ඔවුහු 'අප වෙත බොහෝ වස්තූන්ද දරුවන්ද ඇත. එමෙන්ම අපි දඬුවම් කරනු නොලබන්නෙමු'යි කියති.

37. පවසන්න, 'සැබැවින්ම මාගේ අධිපතියාණන් ඔහු අභිමත අයට ජීවනෝපාය වැඩිකර දෙන්නේය. තවද (ඔහු අභිමත අයට) අඩුකර දෙන්නේය. නමුත් මිනිසුන්ගෙන් බොහෝ අය නොදනිති'.

قُلْ إِنَّ رَبِّي يَبْسُطُ الرِّزْقَ لِمَنْ يَشَآءُ وَيَقْدِرُ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَعْلَمُونَ ﴿٣٧﴾

38. තවද නුඹලාව අප සමීපයට පත් කරන්නේ, නුඹලාගේ වස්තුව හෝ නුඹලාගේ දරුවන් හෝ නොවේ. නමුත් කවුරුන්හෝ විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නේද ඔවුන්මය. ඔවුන් කළ දේට ඔවුනට තිළිණ දෙගුණයක් ලැබෙනු ඇත. එමෙන්ම ඔවුන් සුවිසල් මන්දිරවල සුරක්ෂිතව වෙසෙන්නෝය.

وَمَآ أَمْوَالُكُمْ وَلَآ أَوْلَادُكُم بِالَّتِي تُقَرِّبُكُمْ عِندَنَا زُلْفَىٰٓ إِلَّا مَنْ ءَامَنَ وَعَمِلَ صَالِحًا فَأُولَٰٓئِكَ لَهُمْ جَزَآءُ الضِّعْفِ بِمَا عَمِلُوا وَهُمْ فِي الْغُرُفَٰتِ ءَامِنُونَ ﴿٣٨﴾

39. තවද අපගේ සළකුණුහි (අරමුණ) නිෂ්ඵල කරන්නට ප්‍රයත්න දරණ අය ගත්කල දඬුවමට මුහුණට මුහුණලා ගෙන එනු ලබන්නේ ඔවුහුමය.

وَالَّذِينَ يَسْعَوْنَ فِيٓ ءَايَٰتِنَا مُعَٰجِزِينَ أُولَٰٓئِكَ فِي الْعَذَابِ مُحْضَرُونَ ﴿٣٩﴾

40. පවසන්න, 'නියතවශයෙන්ම මාගේ අධිපතියාණන්, ඔහුගේ දාසයින්ගෙන් ඔහු අභිමත ඇතැම් අයට ජීවනෝපාය වැඩිකර දෙන්නේය. තවද (ඔහු අභිමත) ඇතැම් අයට (එය) අඩුකර දෙන්නේය. තවද නුඹලා කුමක් වැය කළද ඔහු එය පෙරළා දෙන්නේය. තවද ඔහු, ජීවනෝපාය සපයන්නන්ගෙන් අති ශ්‍රේෂ්ඨය'.

قُلْ إِنَّ رَبِّي يَبْسُطُ الرِّزْقَ لِمَن يَشَآءُ مِنْ عِبَادِهِۦ وَيَقْدِرُ لَهُۥ وَمَآ أَنفَقْتُم مِّن شَيْءٍ فَهُوَ يُخْلِفُهُۥ وَهُوَ خَيْرُ الرَّٰزِقِينَ ﴿٤٠﴾

41. තවද ඔහු ඔවුන් සියල්ලවම එක්රැස් කරන එදින (සිහිපත් කරනු). එවිට ඔහු සුරදූතයින්ගෙන් 'ඔවුන් වැදුම් පිදුම් කළේ ඔබලාටමදැ'යි අසන්නේය.

وَيَوْمَ يَحْشُرُهُمْ جَمِيعًا ثُمَّ يَقُولُ لِلْمَلَٰٓئِكَةِ أَهَٰٓؤُلَآءِ إِيَّاكُمْ كَانُوا يَعْبُدُونَ ﴿٤١﴾

42. ඔවුහු, (සුරදූතයින්) 'ඔබ පරිශුද්ධය. ඔවුන්ට එරෙහිව අපගේ

قَالُوا سُبْحَٰنَكَ أَنتَ وَلِيُّنَا مِن دُونِهِم

بَلْ كَانُوا يَعْبُدُونَ الْجِنَّ ۖ أَكْثَرُهُم بِهِم مُّؤْمِنُونَ ﴿٤٢﴾

ආරක්ෂකයා ඔබමය. එහෙත් ඔවුන් ජින්නුන්ට වැඳුම් පිදුම් කළහ. ඔවුන්ගෙන් බොහෝ අය ඔවුන් කෙරෙහිම විශ්වාස කළෝය'යි පවසන්නෝය.

فَالْيَوْمَ لَا يَمْلِكُ بَعْضُكُمْ لِبَعْضٍ نَّفْعًا وَلَا ضَرًّا ۖ وَنَقُولُ لِلَّذِينَ ظَلَمُوا ذُوقُوا عَذَابَ النَّارِ الَّتِي كُنتُم بِهَا تُكَذِّبُونَ ﴿٤٣﴾

43. (අවිශ්වාසිතයින් වෙත මෙලෙස පවසනු ලබන්නේය). 'එබැවින් මෙදින එකිනෙකාට යහපතක් ගෙන දීමට හෝ හානියක් කිරීමට නුඹලාට ශක්තියක් නොවනු ඇත'. තවද අපි වැරදි කළ අය වෙත, 'නුඹලා ප්‍රතික්ෂේප කළ (නිරා) ගින්නේ දඬුවම විඳිනු'යි පවසන්නෙමු.

وَإِذَا تُتْلَىٰ عَلَيْهِمْ آيَاتُنَا بَيِّنَاتٍ قَالُوا مَا هَٰذَا إِلَّا رَجُلٌ يُرِيدُ أَن يَصُدَّكُمْ عَمَّا كَانَ يَعْبُدُ آبَاؤُكُمْ ۖ وَقَالُوا مَا هَٰذَا إِلَّا إِفْكٌ مُّفْتَرًى ۚ وَقَالَ الَّذِينَ كَفَرُوا لِلْحَقِّ لَمَّا جَاءَهُمْ إِنْ هَٰذَا إِلَّا سِحْرٌ مُّبِينٌ ﴿٤٤﴾

44. තවද අපගේ පැහැදිලි වදන් ඔවුන් වෙත පාරායනා කරනු ලබන කල්හි ඔවුහු, 'මොහු මිනිසෙකු මිස නැත, මොහු නුඹලාගේ පියවරුන් වැඳුම් පිදුම් කළ දෙයින් නුඹලාව හැරවීමට තැත් කරන්නේය'යි පවසති. තවද ඔවුහු, 'මෙය ගොතනු ලැබූ බොරුවක් මිස නැත'යි පවසති. තවද විශ්වාස නොකළ අය ගත්කල, ඔවුන් වෙත සත්‍යය පැමිණෙන විට එය පිළිබඳව 'මෙය පැහැදිලි මායාවක් මිස නැත'යි පවසති.

وَمَا آتَيْنَاهُم مِّن كُتُبٍ يَدْرُسُونَهَا ۖ وَمَا أَرْسَلْنَا إِلَيْهِمْ قَبْلَكَ مِن نَّذِيرٍ ﴿٤٥﴾

45. තවද ඔවුනට, ඔවුන් අධ්‍යයනය කරන කිසිදු පුස්තකයක් අපි නොදුන්නෙමු. තවද ඔවුන් වෙත ඔබට පෙර කිසිම අවවාදකරුවෙකු අපි නොඑව්වෙමු.

وَكَذَّبَ الَّذِينَ مِن قَبْلِهِمْ وَمَا بَلَغُوا مِعْشَارَ مَا آتَيْنَاهُمْ فَكَذَّبُوا رُسُلِي ۖ فَكَيْفَ كَانَ نَكِيرِ ﴿٤٦﴾

46. තවද ඔවුන්ට පෙර සිටි අය(ද සත්‍යය) ප්‍රතික්ෂේප කළහ. තවද අප ඔවුනට දුන් දෙයින් දහයෙන් කොටසක්(වත්) මොවුන් අත්කර නොගත්හ. නමුත් මොවුන් අපගේ දූතයින්ව බොරුකාරයින් ලෙස සැළකූහ. එබැවින් මාගේ ග්‍රහණය කෙසේ (දැඩි) වූයේද!

47. පවසන්න, 'මම නුඹලාට එක් දෙයක් (කරන්නට) අනුශාසනා කරමි. එනම් නුඹලා, දෙදෙනා වශයෙන්ද තනිතනිවද අල්ලාහ් ඉදිරියෙන් සිට ගනු. පසුව මෙනෙහි කරනු. නුඹලාගේ සහායකයාට කිසිදු උමතුවක් නැත. ඔහු ඉතා ආසන්නවූ දැඩි දඬුවමක් ගැන නුඹලාට අවවාද කරන්නෙක් පමණි'.

قُلْ إِنَّمَآ أَعِظُكُم بِوَٰحِدَةٍ ۖ أَن تَقُومُوا۟ لِلَّهِ مَثْنَىٰ وَفُرَٰدَىٰ ثُمَّ تَتَفَكَّرُوا۟ ۚ مَا بِصَاحِبِكُم مِّن جِنَّةٍ ۚ إِنْ هُوَ إِلَّا نَذِيرٌ لَّكُم بَيْنَ يَدَىْ عَذَابٍ شَدِيدٍ ﴿٤٧﴾

48. පවසන්න, 'මා නුඹලාගෙන් ඉල්ලූ ප්‍රතිලාභය කුමක් වුවද, එය නුඹලාටමය. මාගේ තිළිණය අල්ලාහ් වෙත පමණය. තවද ඔහු සියලු දේ කෙරෙහි සාක්ෂිකරුය'.

قُلْ مَا سَأَلْتُكُم مِّنْ أَجْرٍ فَهُوَ لَكُمْ ۖ إِنْ أَجْرِىَ إِلَّا عَلَى ٱللَّهِ ۖ وَهُوَ عَلَىٰ كُلِّ شَىْءٍ شَهِيدٌ ﴿٤٨﴾

49. පවසන්න, 'ඇත්තෙන්ම මාගේ අධිපතියාණන් සත්‍යයෙන් (අසත්‍යය) සුනුවිසුනු කරන්නේය. (ඔහු) අදෘෂ්‍යමාන දේ ගැන බැහැවින් නුවණැත්තාය'.

قُلْ إِنَّ رَبِّى يَقْذِفُ بِٱلْحَقِّ عَلَّٰمُ ٱلْغُيُوبِ ﴿٤٩﴾

50. පවසන්න, 'සත්‍යය පැමිණ ඇත. තවද අසත්‍යයට (කිසිවක්) ආරම්භ කරන්නට හෝ (එය) නැවත නැවතත් කරන්නටද නුපුළුවන'.

قُلْ جَآءَ ٱلْحَقُّ وَمَا يُبْدِئُ ٱلْبَٰطِلُ وَمَا يُعِيدُ ﴿٥٠﴾

51. පවසන්න, 'මා නොමගෙහි නම්, මාගේ නොමග යෑමේ වරද මා කෙරෙහිමය. තවද මා යහමග ලද්දේ නම්, එය මාගේ අධිපතියාණන් මාහට අනාවරණය කර ඇති දේ නිසාය. සැබැවින්ම ඔහු සියල්ල අසන්නාය, සමීපවන්තය'.

قُلْ إِن ضَلَلْتُ فَإِنَّمَآ أَضِلُّ عَلَىٰ نَفْسِى ۖ وَإِنِ ٱهْتَدَيْتُ فَبِمَا يُوحِىٓ إِلَىَّ رَبِّىٓ ۚ إِنَّهُۥ سَمِيعٌ قَرِيبٌ ﴿٥١﴾

52. ඔවුන් දැඩි භීතියකට ලක්වන අවස්ථාව ඔබට දැක ගන්නට ලැබුනා නම්! එවිට එහි කිසිදු ගැලවීමක් නොවනු ඇත. තවද ඔවුන් සමීප තැනකින් හසු කරනු ලබනු ඇත.

وَلَوْ تَرَىٰٓ إِذْ فَزِعُوا۟ فَلَا فَوْتَ وَأُخِذُوا۟ مِن مَّكَانٍ قَرِيبٍ ﴿٥٢﴾

وَّقَالُوْٓا اٰمَنَّا بِهٖ ۚ وَاَنّٰى لَهُمُ التَّنَاوُشُ مِنْ مَّكَانٍۭ بَعِيْدٍ ۚ ﴿٥٣﴾

*53. තවද ඔවුහු 'අපි (දැන්) එය කෙරෙහි විශ්වාස කරමු'යි කියන්නෝය. නමුත් ඔවුන්ට මෙතරම් දුර බැහැර ගොස් (විශ්වාසය) කෙසේ අත්කර ගත හැක්කේද?

وَّقَدْ كَفَرُوْا بِهٖ مِنْ قَبْلُ ۚ وَيَقْذِفُوْنَ بِالْغَيْبِ مِنْ مَّكَانٍۭ بَعِيْدٍ ﴿٥٤﴾

54. සැබැවින්ම ඔවුන් පෙරසිටම එය ප්‍රතික්ෂේප කළහ. තවද ඔවුන් දුරස්ථ වූ ස්ථානයක සිට අනුමානයන්හි ගිලිහී සිටිති.

وَحِيْلَ بَيْنَهُمْ وَبَيْنَ مَا يَشْتَهُوْنَ كَمَا فُعِلَ بِاَشْيَاعِهِمْ مِّنْ قَبْلُ ۗ اِنَّهُمْ كَانُوْا فِيْ شَكٍّ مُّرِيْبٍ ﴿٥٥﴾

55. මෙයට පෙර මොවුන් වැනි අයහට බාධා කරනු ලැබුවා සේ මොවුන්ටද මොවුන් කැමති වූ දේටද අතර බාධකයක් ඇති කරන ලදී, ඇත්තෙන්ම ඔවුහු(ද) නොසැනසිල්ල ඇතිකරන්නාවූ සැකයෙන් පසුවූහ.

*සටහන. 53: ඔවුන් පෙර සිටම තමන්ව විශ්වාසයෙන් ඈත් කරගත් නිසා දඬුවම පැමිණෙන මොහොතේ ඔවුන්ට එම විශ්වාසය අත්කරගත නොහැකිවීම මෙයින් පහසුවෙන් අර්ථවත් වේ.



## ෆාතිර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡحَمۡدُ لِلّٰهِ فَاطِرِ السَّمٰوٰتِ وَالۡاَرۡضِ جَاعِلِ الۡمَلٰٓـئِكَةِ رُسُلًا اُولِىۡۤ اَجۡنِحَةٍ مَّثۡنٰى وَثُلٰثَ وَرُبٰعَ‌ ؕ يَزِيۡدُ فِى الۡخَـلۡقِ مَا يَشَآءُ‌ ؕ اِنَّ اللّٰهَ عَلٰى كُلِّ شَىۡءٍ قَدِيۡرٌ ﴿٢﴾

2. සියලු ප්‍රශංසා අල්ලාහ්ට හිමිය. අහස් සහ පොළොවේ මැවුම්කරුවාණන්ය. පියාපත් දෙක, තුන සහ හතර ලත් සුරදූතයින්ව පණිවිඩකරුවන් ලෙස සේවයට යොදවන්නාය. ඔහු තම අභිමතය පරිදි තම මැවීම්හි වැඩි කරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියලු දේ කෙරෙහි බලය ඇත්තාය.

مَا يَفۡتَحِ اللّٰهُ لِلنَّاسِ مِنۡ رَّحۡمَةٍ فَلَا مُمۡسِكَ لَهَا‌ ۚ وَمَا يُمۡسِكۡ ۙ فَلَا مُرۡسِلَ لَهٗ مِنۡۢ بَعۡدِهٖ‌ ؕ وَهُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ ﴿٣﴾

3. අල්ලාහ් මිනිසුන්ට යම් දායාදයක් පිරිනමන්නේද එය වළක්වන්නෙක් නැත. ඔහු යම් දෙයක් වළක්වන්නේද එයට පසු එය ලබා දෙන්නෙක්ද නැත. තවද ඔහු බලසම්පන්නය ප්‍රඥාසම්පන්නය.

يٰۤاَيُّهَا النَّاسُ اذۡكُرُوۡا نِعۡمَتَ اللّٰهِ عَلَيۡكُمۡ‌ ؕ هَلۡ مِنۡ خَالِـقٍ غَيۡرُ اللّٰهِ يَرۡزُقُكُمۡ مِّنَ السَّمَآءِ وَالۡاَرۡضِ‌ ؕ لَاۤ اِلٰهَ اِلَّا هُوَ‌ ۖ فَاَنّٰى تُؤۡفَكُوۡنَ ﴿٤﴾

4. එම්බල මිනිසුනි! අල්ලාහ්ගෙන් නුඹලා වෙතවූ අනුග්‍රහය සිහිපත් කරනු. අහස් සහ පොළොවෙන් නුඹලාට ජීවනෝපාය සපයන්නා අල්ලාහ් හැර වෙනත් මැවුම්කරුවෙක් සිටින්නේද? නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙක් නොමැත. පසුව නුඹලා කොහේ හරවනු ලබන්නෙහුද?

وَاِنۡ يُّكَذِّبُوۡكَ فَقَدۡ كُذِّبَتۡ رُسُلٌ مِّنۡ قَبۡلِكَ‌ ؕ وَاِلَى اللّٰهِ تُرۡجَعُ الۡاُمُوۡرُ ﴿٥﴾

5. තවද ඔවුන් ඔබව ප්‍රතික්ෂේප කරන්නේ නම්, සැබැවින්ම (අල්ලාහ්ගේ) දූතයෝ ඔබට පෙරත් ප්‍රතික්ෂේප කරනු ලැබූහ. තවද (සියළු) දේ (තීරණය සඳහා) අල්ලාහ් වෙතම ආපසු ගෙන එනු ලබන්නේය.

يٰۤاَيُّهَا النَّاسُ اِنَّ وَعۡدَ اللّٰهِ حَقٌّ فَلَا

6. එම්බල මිනිසුනි! නියතවශයෙන්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍ය වේ.

تَغُرَّنَّكُمُ الْحَيٰوةُ الدُّنْيَا ۥ وَلَا يَغُرَّنَّكُمْ بِاللّٰهِ الْغَرُوْرُ ۝٦

එබැවින් මෙලෝ ජීවිතය නුඹලාව මුලා නොකරත්වා. තවද මුලාකරන්නා (ෂෙයිතාන්) අල්ලාහ් පිළිබඳව නුඹලාව මුලා නොකරත්වා.

اِنَّ الشَّيْطٰنَ لَكُمْ عَدُوٌّ فَاتَّخِذُوْهُ عَدُوًّا ؕ اِنَّمَا يَدْعُوْا حِزْبَهٗ لِيَكُوْنُوْا مِنْ اَصْحٰبِ السَّعِيْرِ ؕ ۝٧

7. නියතවශයෙන්ම ෂෙයිතාන් නුඹලාට සතුරාය. එබැවින් ඔහුව සතුරෙකු ලෙස ගනු. ඔහු ඔහුගේ අනුගාමිකයින්ව කැඳවන්නේ, දැවෙන ගින්නේ සහකරුවන් බවට ඔවුන් පත්වීමටය.

اَلَّذِيْنَ كَفَرُوْا لَهُمْ عَذَابٌ شَدِيْدٌ ؕ۬ وَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ لَهُمْ مَّغْفِرَةٌ وَّاَجْرٌ كَبِيْرٌ ۝٨ ع

8. අවිශ්වාස කරන අය සඳහා දැඩි දඬුවමක් ඇත. තවද විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අය සඳහා ක්ෂමාවද මහඟු තිළිණයද ඇත.

اَفَمَنْ زُيِّنَ لَهٗ سُوْٓءُ عَمَلِهٖ فَرَاٰهُ حَسَنًا ؕ فَاِنَّ اللّٰهَ يُضِلُّ مَنْ يَّشَآءُ وَيَهْدِيْ مَنْ يَّشَآءُ ۖ فَلَا تَذْهَبْ نَفْسُكَ عَلَيْهِمْ حَسَرٰتٍ ؕ اِنَّ اللّٰهَ عَلِيْمٌ ۢ بِمَا يَصْنَعُوْنَ ۝٩

9. තමාගේ ක්‍රියාවෙහි නපුර තමාට අලංකාර කරනු ලැබ පසුව තමා එය යහපතක් යැයි දකින ඔහු, (විශ්වාස කොට ඇත්තෙන්ම යහපත් ක්‍රියා කරන කෙනෙකුට සමාන) වේද? නියතවශයෙන්ම අල්ලාහ් ඔහු අභිමත අයට නොමග යන්නට ඉඩ හරින්නේය. තවද ඔහු අභිමත අයට මග පෙන්වන්නේය. එබැවින් ඔවුන් වෙනුවෙන් ශෝකයට පත්වී ඔබගේ ආත්මය අපතේ යෑමට ඉඩ නොහරින්න. නියතවශයෙන්ම අල්ලාහ් ඔවුන් කරන දේ මැනැවින් දන්නේය.

وَاللّٰهُ الَّذِيْٓ اَرْسَلَ الرِّيٰحَ فَتُثِيْرُ سَحَابًا فَسُقْنٰهُ اِلٰى بَلَدٍ مَّيِّتٍ فَاَحْيَيْنَا بِهِ الْاَرْضَ بَعْدَ مَوْتِهَا ؕ كَذٰلِكَ النُّشُوْرُ ۝١٠

10. තවද වළාකුළු ඔසවන්නා වූ සුළඟ එවන ඔහු අල්ලාහ්ය. පසුව අපි ඒවා අප්‍රාණික භූමිය කරා ඇදගෙන යන්නෙමු. තවද එමගින් භූමිය, එහි මරණයෙන් පසු ප්‍රාණවත් කරන්නෙමු. පුනරුත්ථානයද මේ අයුරින්ම සිදුවනු ඇත.

مَنْ كَانَ يُرِيْدُ الْعِزَّةَ فَلِلّٰهِ الْعِزَّةُ جَمِيْعًا ؕ

11. කවුරුන් හෝ ගෞරවයට කැමති වන්නේද සියළු ගෞරවය අල්ලාහ්ට

إِلَيْهِ يَصْعَدُ الْكَلِمُ الطَّيِّبُ وَالْعَمَلُ
الصَّالِحُ يَرْفَعُهُ ۚ وَالَّذِينَ يَمْكُرُونَ
السَّيِّئَاتِ لَهُمْ عَذَابٌ شَدِيدٌ ۖ وَمَكْرُ
أُولَٰئِكَ هُوَ يَبُورُ ١١

අයත් වන්නේ (යැයි දැනගනිත්වා). යහපත් වදන් ඔහු වෙතටම ආරෝහණය වන්නේය. තවද ධාර්මිෂ්ඨ ක්‍රියාව එය උසස් කරන්නේය. තවද නපුරු කුමන්ත්‍රණ කරන අය ගත්කල, ඔවුන් සඳහා දැඩි දඬුවමක් ඇත. තවද එවන් අයගේ කුමන්ත්‍රණ විනාශ වී යන්නක් වේ.

وَاللَّهُ خَلَقَكُم مِّن تُرَابٍ ثُمَّ مِن نُّطْفَةٍ ثُمَّ
جَعَلَكُمْ أَزْوَاجًا ۚ وَمَا تَحْمِلُ مِنْ أُنثَىٰ
وَلَا تَضَعُ إِلَّا بِعِلْمِهِ ۚ وَمَا يُعَمَّرُ مِن
مُّعَمَّرٍ وَلَا يُنقَصُ مِنْ عُمُرِهِ إِلَّا
فِي كِتَابٍ ۚ إِنَّ ذَٰلِكَ عَلَى اللَّهِ يَسِيرٌ ١٢

12. තවද අල්ලාහ් නුඹලාව දූවිලි පසින්ද පසුව ශුක්‍ර බිඳුවකින්ද මැව්වේය. පසුව ඔහු නුඹලාව ජෝඩු බවට පත් කළේය. තවද කිසිදු ස්ත්‍රියක්, ඔහුගේ දැනුමෙන් තොරව ගැබ් ගන්නේද නැත, (දරුවෙකු) ප්‍රසූත කරන්නේද නැත. තවද ඕනෑම ආයුෂ ලැබූවෙක් දීර්ඝායුෂ ලබන්නේත් ඔහුගේ ආයුෂයෙන් කිසිවක් අඩු කරනු ලබන්නේත් ග්‍රන්ථයෙහි (සටහන් වී) මිස නැත. එය නියතවශයෙන්ම අල්ලාහ්ට පහසු දෙයකි.

وَمَا يَسْتَوِي الْبَحْرَانِ ۖ هَٰذَا عَذْبٌ فُرَاتٌ
سَائِغٌ شَرَابُهُ وَهَٰذَا مِلْحٌ أُجَاجٌ ۖ وَمِن
كُلٍّ تَأْكُلُونَ لَحْمًا طَرِيًّا وَتَسْتَخْرِجُونَ
حِلْيَةً تَلْبَسُونَهَا ۖ وَتَرَى الْفُلْكَ فِيهِ
مَوَاخِرَ لِتَبْتَغُوا مِن فَضْلِهِ وَلَعَلَّكُمْ
تَشْكُرُونَ ١٣

13. තවද මුහුදු දෙක එක හා සමාන නොවේ. එකක් රසවත්ය. ප්‍රබෝධමත්ය. තවද බීමට හිතකරය. අනෙක ලුණු රසය. තිත්තය. තවද නුඹලා සෑම එකකින්ම නැවුම් මාංශ අනුභව කරන්නෙහුය. තවද නුඹලා පළඳින ආභරණ එයින් පිටතට ගන්නෙහුය. තවද නුඹලා ඔහුගේ වරප්‍රසාදය සොයනු පිණිසද, නුඹලා කෘතඥ වනු පිණිසද, ඔබ (රළ)භාගෙන ඉදිරියට ගමන් කරන්නා වූ නැව් එහි දකින්නෙහිය.

يُولِجُ اللَّيْلَ فِي النَّهَارِ وَيُولِجُ النَّهَارَ فِي اللَّيْلِ
وَسَخَّرَ الشَّمْسَ وَالْقَمَرَ كُلٌّ يَجْرِي

14. ඔහු රැය දවාලයෙහි ඇතුළු කරන්නේය. තවද ඔහු දහවල රැයෙහි ඇතුළු කරන්නේය. තවද ඔහු සේවය පිණිස ඉර සහ සඳ යොදවා ඇත්තේය. මේ හැම එකක්ම

لِاَجَلٍ مُّسَمًّى ؕ ذٰلِكُمُ اللّٰهُ رَبُّكُمْ لَهُ الْمُلْكُ ؕ وَالَّذِيْنَ تَدْعُوْنَ مِنْ دُوْنِهٖ مَا يَمْلِكُوْنَ مِنْ قِطْمِيْرٍ ؕ ﴿١٤﴾

නියමිත කාලය තෙක් සිය පථයේ ගමන් කරයි. නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ් එලෙසය. රාජධානිය ඔහුගේය. තවද නුඹලා අල්ලාහ් හැර කැඳවන (වෙනත්) අයට අංශු මාත්‍රයකටවත් හිමිකමක් නැත.

اِنْ تَدْعُوْهُمْ لَا يَسْمَعُوْا دُعَآءَكُمْ ۚ وَلَوْ سَمِعُوْا مَا اسْتَجَابُوْا لَكُمْ ؕ وَيَوْمَ الْقِيٰمَةِ يَكْفُرُوْنَ بِشِرْكِكُمْ ؕ وَلَا يُنَبِّئُكَ مِثْلُ خَبِيْرٍ ﴿١٥﴾ ع

15. නුඹලා ඔවුන්ව කැඳවුයේ නම් ඔවුහු නුඹලාගේ කැඳවීමට සවන් නොදෙන්නෝය. තවද ඔවුන් එයට සවන් දුන්නත් නුඹලාට පිළිතුරු දීමට ඔවුන්හට නොහැකි වනු ඇත. තවද පුනරුත්ථාන දිනයේදී ඔවුහු නුඹලා (දෙවියන්ට) සමාන තබා ඇති (ඔවුන්ව) ප්‍රතික්ෂේප කරන්නෝය. තවද සියල්ල විමසිලිමත් වන තැනැත්තාට මෙන් අන් කිසිවෙකුටත් ඔබට දැන්විය නොහැක.

يٰۤاَيُّهَا النَّاسُ اَنْتُمُ الْفُقَرَآءُ اِلَى اللّٰهِ ۚ وَاللّٰهُ هُوَ الْغَنِيُّ الْحَمِيْدُ ﴿١٦﴾

16. එම්බල මිනිසුනි! අල්ලාහ් අභියස නුඹලා හුදෙක් සිඟන්නන්ය. නමුත් අල්ලාහ් ස්වයංපෝෂිතය, ප්‍රසංශා හිමිය.

اِنْ يَّشَاْ يُذْهِبْكُمْ وَيَاْتِ بِخَلْقٍ جَدِيْدٍ ۚ ﴿١٧﴾

17. ඔහු අභිමත වන්නේ නම් නුඹලාව විනාශ කොට, (ඒ වෙනුවට) නව මැවීමක් ඔහුට ගෙන ආ හැක.

وَمَا ذٰلِكَ عَلَى اللّٰهِ بِعَزِيْزٍ ﴿١٨﴾

18. තවද එය අල්ලාහ්ට අසිරු නොවේ.

وَلَا تَزِرُ وَازِرَةٌ وِّزْرَ اُخْرٰى ؕ وَاِنْ تَدْعُ مُثْقَلَةٌ اِلٰى حِمْلِهَا لَا يُحْمَلْ مِنْهُ شَيْءٌ وَّلَوْ كَانَ ذَا قُرْبٰى ؕ اِنَّمَا تُنْذِرُ الَّذِيْنَ يَخْشَوْنَ رَبَّهُمْ بِالْغَيْبِ وَاَقَامُوا الصَّلٰوةَ ؕ وَمَنْ تَزَكّٰى فَاِنَّمَا يَتَزَكّٰى لِنَفْسِهٖ ؕ وَاِلَى اللّٰهِ الْمَصِيْرُ ﴿١٩﴾

19. තවද බර උසුලන්නෙක් වෙනත් කෙනෙකුගේ බර නොඋසුලන්නේය. තවද වැඩි බර පටවන ලද්දෙක් තම බර (ඉසිලීමට) වෙනත් කෙනෙකුව කැඳවන්නේ නම්, ඔහු ඥාතියෙකු වුවද එයින් කිසිවක් (ඔහු විසින්) නොඋසුලනු ලබන්නේය. ඔබට අවවාද කළ හැක්කේ තමන්ගේ අධිපතියාණන්ට රහසිගතව බිය දක්වන එමෙන්ම නමස්කාරයෙහි නිරතවන අයහට පමණි. තවද යමෙක් තමාව පවිත්‍ර කර ගන්නේද, තමන්ගේ යහපත සඳහා පමණක් පවිත්‍ර කර ගන්නේය. තවද ආපසු පැමිණීම අල්ලාහ් වෙතට වනු ඇත.

وَمَا يَسْتَوِي الْأَعْمٰى وَالْبَصِيرُ ﴿٢٠﴾

20. තවද අන්ධයා සහ පෙනුම ඇත්තා එක සමාන නොවෙති.

وَلَا الظُّلُمٰتُ وَلَا النُّورُ ﴿٢١﴾

21. තවද අන්ධකාරය සහ ආලෝකය (සමාන) නොවේ.

وَلَا الظِّلُّ وَلَا الْحَرُورُ ﴿٢٢﴾

22. තවද සෙවන සහ අව්ව (සමාන) නොවේ.

وَمَا يَسْتَوِي الْأَحْيَاءُ وَلَا الْأَمْوَاتُ ۚ إِنَّ اللّٰهَ يُسْمِعُ مَنْ يَشَاءُ ۖ وَمَا أَنْتَ بِمُسْمِعٍ مَنْ فِي الْقُبُورِ ﴿٢٣﴾

23. තවද ජීවය ඇත්තන්ද මියගියවුන්ද සමාන නොවෙති. නියතවශයෙන්ම අල්ලාහ් තමාට අභිමත අයට ඇසෙන්නට සලස්වන්නේය. තවද ඔබට සොහොන්හි සිටින්නන්හට ඇසෙන්නට සැලැස්වීමට නොහැකිය.

إِنْ أَنْتَ إِلَّا نَذِيرٌ ﴿٢٤﴾

24. ඔබ අවවාදකරුවෙකු පමණය.

إِنَّا أَرْسَلْنٰكَ بِالْحَقِّ بَشِيرًا وَنَذِيرًا ۚ وَإِنْ مِنْ أُمَّةٍ إِلَّا خَلَا فِيهَا نَذِيرٌ ﴿٢٥﴾

25. සැබැවින්ම අපි ඔබව ශුභාරංචි ගෙන එන්නකු ලෙසද, අවවාද කරන්නෙකු ලෙසද සත්‍යය සමග එවා ඇත්තෙමු. තවද අවවාදකරුවෙකු නොඑවන ලද කිසිම ජනසමූහයක් නොමැත.

وَإِنْ يُكَذِّبُوكَ فَقَدْ كَذَّبَ الَّذِينَ مِنْ قَبْلِهِمْ ۚ جَاءَتْهُمْ رُسُلُهُمْ بِالْبَيِّنٰتِ وَبِالزُّبُرِ وَبِالْكِتٰبِ الْمُنِيرِ ﴿٢٦﴾

26. තවද ඔවුන් ඔබව මුසාවාදියෙකු ලෙස සළකන්නේ නම්, ඔවුන්ට පෙර සිටි අයද (ඔවුන්ගේ ධර්මදූතවරුන්ව) මුසාවාදීන් ලෙස සැළකූහ. ඔවුන්ගේ දූතයින් ඔවුන් වෙත පැහැදිලි සළකුණු සමගද ශුද්ධ ලියවිලි සමගද දීප්තිමත් පුස්තකය සමගද පැමිණියහ.

ثُمَّ أَخَذْتُ الَّذِينَ كَفَرُوا ۖ فَكَيْفَ كَانَ نَكِيرِ ﴿٢٧﴾

27. පසුව මම අවිශ්වාස කළ අයව හසු කර ගත්තෙමි. තවද මාගේ දඬුවම කෙතරම් (බිහිසුනු) විද?

أَلَمْ تَرَ أَنَّ اللّٰهَ أَنْزَلَ مِنَ السَّمَاءِ مَاءً ۚ فَأَخْرَجْنَا بِهِ ثَمَرٰتٍ مُخْتَلِفًا أَلْوَانُهَا ۚ

28. අල්ලාහ් අහසින් ජලය පහළ කරන සැටි ඔබ නොදකින්නෙහිද? තවද අපි එමගින් විවිධ වර්ණ වලින් යුත් පළතුරු හටගන්වන්නෙමු. තවද කඳු අතර ඇතැම් ඒවා සුදු සහ රතු වර්ණ සහිතය. ඇතැම් ඒවායේ

وَمِنَ الْجِبَالِ جُدَدٌۢ بِيْضٌ وَّحُمْرٌ مُّخْتَلِفٌ اَلْوَانُهَا وَغَرَابِيْبُ سُوْدٌ ﴿٢٨﴾

වර්ණයන් විවිධය. තවද තද කළු පැහැ ඒවාද ඇත.

وَمِنَ النَّاسِ وَالدَّوَآبِّ وَالْاَنْعَامِ مُخْتَلِفٌ اَلْوَانُهٗ كَذٰلِكَ ؕ اِنَّمَا يَخْشَى اللّٰهَ مِنْ عِبَادِهِ الْعُلَمٰٓؤُا ؕ اِنَّ اللّٰهَ عَزِيْزٌ غَفُوْرٌ ﴿٢٩﴾

29. තවද මිනිසුන් සතුන් සහ ගවසතුන්ගෙන්ද මෙයාකාරයට විවිධ වර්ණයන් ඇත. නියතවශයෙන්ම අල්ලාහ් කෙරෙහි බිය දක්වන්නේ ඔහුගේ දාසයින් අතුරින් දැනුමැත්තන් පමණි. සැබැවින්ම අල්ලාහ් බලසම්පන්නය, අතිශයින් ක්ෂමාන්විතය.

اِنَّ الَّذِيْنَ يَتْلُوْنَ كِتٰبَ اللّٰهِ وَاَقَامُوا الصَّلٰوةَ وَاَنْفَقُوْا مِمَّا رَزَقْنٰهُمْ سِرًّا وَّعَلَانِيَةً يَّرْجُوْنَ تِجَارَةً لَّنْ تَبُوْرَ ۙ﴿٣٠﴾

30. නියතවශයෙන්ම අල්ලාහ්ගේ ග්‍රන්ථය අනුගමනය කර, නමස්කාරයෙහි නිරතවී, අප ඔවුන්ට සලසාදුන් දෙයින් රහසිගතව සහ එළිපිට වැය කරන අය ගත්කල ඔවුන් කිසිසේත් අසාර්ථක නොවන ගනුදෙනුවක් අපේක්ෂා කරන්නෝය.

لِيُوَفِّيَهُمْ اُجُوْرَهُمْ وَيَزِيْدَهُمْ مِّنْ فَضْلِهٖ ؕ اِنَّهٗ غَفُوْرٌ شَكُوْرٌ ﴿٣١﴾

31. මෙය හේතු කොට ගෙන ඔහු ඔවුනට ඔවුන්ගේ තිළිණයන් සම්පූර්ණයෙන් පිරිනමනු ඇත. තවද ඔහුගේ අනුග්‍රහයෙන් ඔවුනට (තවතවත්) වර්ධනය කරනු ඇත. නියතවශයෙන්ම ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, ඉතා අගේ කොට සලකන්නාය.

وَالَّذِيْٓ اَوْحَيْنَآ اِلَيْكَ مِنَ الْكِتٰبِ هُوَ الْحَقُّ مُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيْهِ ؕ اِنَّ اللّٰهَ بِعِبَادِهٖ لَخَبِيْرٌۢ بَصِيْرٌ ﴿٣٢﴾

32. තවද අපි ඔබහට (මෙම) ග්‍රන්ථයෙන් අනාවරණය කර ඇති දේ සත්‍යය වන්නේය. මෙය මෙයට පෙර ඇති දේ සත්‍ය කරවන්නකි. නියතවශයෙන්ම අල්ලාහ් තම දාසයින් පිළිබඳව සියල්ල විමසිලිමත්ය, සියල්ල දකින්නාය.

ثُمَّ اَوْرَثْنَا الْكِتٰبَ الَّذِيْنَ اصْطَفَيْنَا مِنْ عِبَادِنَا ۚ فَمِنْهُمْ ظَالِمٌ لِّنَفْسِهٖ ۚ وَمِنْهُمْ مُّقْتَصِدٌ ۚ وَمِنْهُمْ سَابِقٌۢ بِالْخَيْرٰتِ بِاِذْنِ

33. පසුව අපගේ දාසයින්ගෙන් අපි තෝරාගත් අයහට මෙම ග්‍රන්ථය උරුම කර දුන්නෙමු. තවද ඔවුන්ගෙන් (සමහර) අය (තමන්ගේ ආශාවන් යටපත් කරමින්) තමන්ට පීඩා ඇති කරගන්නනය. තවද

ٱللَّهِ ۚ ذَٰلِكَ هُوَ ٱلْفَضْلُ ٱلْكَبِيرُ ۝٣٣

ඔවුන්ගෙන් (සමහර) අය මධ්‍යස්ථ මාර්ගය රැක ගන්නන්ය. තවද ඔවුන්ගෙන් සමහර අය අල්ලාහ්ගේ අවසරය ඇතිව යහපත් ක්‍රියාවන්හි (අනුන්ට වඩා) ඉදිරියෙන් සිටින්නන්ය. තවද එය (ඇත්තෙන්ම) අතිමහත් වරප්‍රසාදයකි.

جَنَّٰتُ عَدْنٍ يَدْخُلُونَهَا يُحَلَّوْنَ فِيهَا مِنْ أَسَاوِرَ مِن ذَهَبٍ وَلُؤْلُؤًا ۖ وَلِبَاسُهُمْ فِيهَا حَرِيرٌ ۝٣٤

34. නිත්‍ය උද්‍යානයන් වේ. ඔවුන් ඒවායෙහි පිවිසෙන්නෝය. එහිදී ඔවුන් රන් වළලු සහ මුතුද පළඳවනු ලබන්නෝය. තවද ඔවුන්ගේ වස්ත්‍රය එහි සේදයෙන් වනු ඇත.

وَقَالُوا۟ ٱلْحَمْدُ لِلَّهِ ٱلَّذِىٓ أَذْهَبَ عَنَّا ٱلْحَزَنَ ۖ إِنَّ رَبَّنَا لَغَفُورٌ شَكُورٌ ۝٣٥

35. තවද ඔවුහු, 'අපගෙන් ශෝකය ඉවත් කළ අල්ලාහ්ටම සියලු ප්‍රශංසා අයත් වේ. නියතවශයෙන්ම, අපගේ අධිපතියාණන් අතිශයින්ම ක්ෂමාන්විතය, ඉතා අගේ කොට සලකන්නායැ'යි පවසන්නෝය.

ٱلَّذِىٓ أَحَلَّنَا دَارَ ٱلْمُقَامَةِ مِن فَضْلِهِۦ لَا يَمَسُّنَا فِيهَا نَصَبٌ وَلَا يَمَسُّنَا فِيهَا لُغُوبٌ ۝٣٦

36. 'ඔහුම තම අනුග්‍රහයෙන් අපව සදාකාලික වාසස්ථානයෙහි පදිංචි කර ඇත්තේය. එහිදී අපව දුක් පීඩාව වෙළා නොගනු ඇත. තවද එහි කිසිදු තෙහෙට්ටුවද අපව වෙළා නොගනු ඇත'.

وَٱلَّذِينَ كَفَرُوا۟ لَهُمْ نَارُ جَهَنَّمَ لَا يُقْضَىٰ عَلَيْهِمْ فَيَمُوتُوا۟ وَلَا يُخَفَّفُ عَنْهُم مِّنْ عَذَابِهَا ۚ كَذَٰلِكَ نَجْزِى كُلَّ كَفُورٍ ۝٣٧

37. නමුත් අවිශ්වාස කරන අය ගත් කළ ඔවුනට නිරයේ ගින්නය. ඔවුන් මැරියනු පිණිසද ඔවුනට තීන්දු නොකරනු ලබන්නේය. එමෙන්ම එයින් දඬුවම ඔවුන්ට ලිහිල්ද නොකරනු ලබන්නේය. මෙලෙස අපි සෑම අකෘතඥ කෙනෙකුටම ප්‍රතිවිපාක දෙන්නෙමු.

وَهُمْ يَصْطَرِخُونَ فِيهَا رَبَّنَآ أَخْرِجْنَا نَعْمَلْ صَٰلِحًا غَيْرَ ٱلَّذِى كُنَّا نَعْمَلُ ۚ أَوَلَمْ نُعَمِّرْكُم مَّا يَتَذَكَّرُ فِيهِ مَن تَذَكَّرَ

38. තවද ඔවුහු එහි උදව් පතා, 'අපගේ අධිපතියාණෙනි! අපව බැහැර කරනු මැනව. අප කරමින් සිටි දේ වෙනුවට අපි ධාර්මිෂ්ඨ ක්‍රියාවන් කරන්නෙමු'යි විලාප නගන්නෝය. (එවිට දෙවියන්), 'මෙනෙහි කරන අයට එහි (ලොවෙහි)

وَجَآءَكُمُ النَّذِيرُ ۖ فَذُوقُوا فَمَا لِلظّٰلِمِينَ مِن نَّصِيرٍ ﴿٣٨﴾

මෙනෙහි කිරීමට හැකිවනු පිණිස අපි නුඹලාට දීර්ඝායුශ ලබා නොදුන්නෙමුද? තවද නුඹලා වෙත අවවාදකරුවෙකු පැමිණියේය. එබැවින් (මෙම දඬුවම) විඳිනු. වරදකරුවන්ට කිසිදු උදව්කරුවෙකු නොවන්නේයැ'(යි පවසන්නේය).

إِنَّ اللّٰهَ عٰلِمُ غَيْبِ السَّمٰوٰتِ وَالْأَرْضِ ۚ إِنَّهُۥ عَلِيمٌۢ بِذَاتِ الصُّدُورِ ﴿٣٩﴾

39. සැබැවින්ම අල්ලාහ් අහස්හි මෙන්ම පොළොවෙහි ඇති රහස් දන්නේය. සැබැවින්ම ඔහු සිත්හි (සැඟවුනු) සියල්ල මැනවින් දන්නේය.

هُوَ الَّذِي جَعَلَكُمْ خَلٰٓئِفَ فِي الْأَرْضِ ۚ فَمَن كَفَرَ فَعَلَيْهِ كُفْرُهُۥ ۖ وَلَا يَزِيدُ الْكٰفِرِينَ كُفْرُهُمْ عِندَ رَبِّهِمْ إِلَّا مَقْتًا ۖ وَلَا يَزِيدُ الْكٰفِرِينَ كُفْرُهُمْ إِلَّا خَسَارًا ﴿٤٠﴾

40. නුඹලාව පොළොවෙහි නියෝජිතයින් කළේ ඔහුමය. එබැවින් කවුරුන් හෝ අවිශ්වාස කරන්නේද, ඔහුගේ අවිශ්වාසයේ (ප්‍රතිවිපාකය ඔහුම) අත්විඳිනු ඇත. තවද අවිශ්වාසිතයින්හට ඔවුන්ගේ අවිශ්වාසය ඔවුන්ගේ අධිපතියාණන් අභියස උදහස මිස අන් දෙයක් වැඩි නොකරනු ඇත. තවද අවිශ්වාසිතයින්හට ඔවුන්ගේ අවිශ්වාසය පාඩු විඳීම මිස අන් දෙයක් වැඩි නොකරනු ඇත.

قُلْ أَرَءَيْتُمْ شُرَكَآءَكُمُ الَّذِينَ تَدْعُونَ مِن دُونِ اللّٰهِ أَرُونِي مَاذَا خَلَقُوا مِنَ الْأَرْضِ أَمْ لَهُمْ شِرْكٌ فِي السَّمٰوٰتِ أَمْ ءَاتَيْنٰهُمْ كِتٰبًا فَهُمْ عَلٰى بَيِّنَتٍ مِّنْهُ ۚ بَلْ إِن يَعِدُ الظّٰلِمُونَ بَعْضُهُم بَعْضًا إِلَّا غُرُورًا ﴿٤١﴾

41. පවසන්න, 'නුඹලා අල්ලාහ් හැර කැඳවන නුඹලාගේ හවුල්කාර දෙවිවරුන්ව නුඹලා දැක තිබේද? (එසේනම්) ඔවුන් පොළොවෙහි මවා ඇති දේ මාහට පෙන්වනු. නැතහොත් අහස් නිර්මාණයෙහි කොටසක් ඔවුන්ට තිබේද? නැතහොත් ඔවුන් වෙත සාධකයක් ඇති පුස්තකයක් අපි ඔවුනට ලබාදී ඇත්තෙමුද?' නොඑසේය, වරදකරුවන් එකිනෙකාට පොරොන්දු වන්නේ රැවටීම මිස අන් දෙයක් නැත.

إِنَّ اللّٰهَ يُمْسِكُ السَّمٰوٰتِ وَالْأَرْضَ أَن تَزُولَا ۚ وَلَئِن زَالَتَآ إِنْ أَمْسَكَهُمَا مِنْ أَحَدٍ مِّنۢ بَعْدِهِۦٓ ۚ إِنَّهُۥ كَانَ حَلِيمًا غَفُورًا ﴿٤٢﴾

42. නියතවශයෙන්ම අල්ලාහ් අහස් සහ පොළොව, ඒවා (සිය ස්ථානයෙන්) බැහැර නොයන සේ රඳවා තබන්නේය. තවද ඒවා බැහැර ගියේ නම් ඔහු හැර අන් කිසිවෙකුටත් ඒවා රඳවා තබා ගත නොහැක. සැබැවින්ම ඔහු ඉවසිලිවන්තය, අතිශයින්ම ක්ෂමාන්විතය.

وَاَقۡسَمُوۡا بِاللّٰهِ جَهۡدَ اَيۡمَانِهِمۡ لَئِنۡ
جَآءَهُمۡ نَذِيۡرٌ لَّيَكُوۡنُنَّ اَهۡدٰى مِنۡ
اِحۡدَى الۡاُمَمِ‌ۚ فَلَمَّا جَآءَهُمۡ نَذِيۡرٌ
مَّا زَادَهُمۡ اِلَّا نُفُوۡرَا ۙ ﴿٤٣﴾

43. තවද, ඔවුන් වෙතට අවවාද කරුවෙකු පැමිණියහොත්, ඔවුන් අන් ඕනෑම ජනතාවට වඩා විශිෂ්ඨව හරිමග අනුගමනය කරන්නෝ යැයි ඔවුන් ඔවුන්ගේ දැඩි දිවිරුම් වලින් අල්ලාහ් මත දිවිරති. නමුත් ඔවුන් වෙතට අවවාදකරුවෙකු පැමිණි විට එය ඔවුනට පිළිකුල පමණක් වැඩි කළේය.

اسۡتِكۡبَارًا فِى الۡاَرۡضِ وَمَكۡرَ السَّيِّئِ‌ ؕ
وَلَا يَحِيۡقُ الۡمَكۡرُ السَّيِّئُ اِلَّا بِاَهۡلِهٖ‌ ؕ
فَهَلۡ يَنۡظُرُوۡنَ اِلَّا سُنَّتَ الۡاَوَّلِيۡنَ‌ ۚ
فَلَنۡ تَجِدَ لِسُنَّتِ اللّٰهِ تَبۡدِيۡلًا ۚ‌
وَلَنۡ تَجِدَ لِسُنَّتِ اللّٰهِ تَحۡوِيۡلًا ﴿٤٤﴾

44. (එය ඔවුන්ගේ) පොළොවෙහි උඩඟුවීම සහ නපුරු සැලැසුම් කිරීම හේතුවෙනි. නමුත් නපුරු සැලැස්ම එහි නිර්මාණකරුවන්වම හසුකර ගන්නේය. එසේනම් (අල්ලාහ්ගෙන් වූ) පෙර සිටි ජනතාවන්ගේ පිළිවෙත මිස වෙනත් දෙයක් ඔවුන් බලා සිටින්නෝද? නමුත් අල්ලාහ්ගේ පිළිවෙතෙහි කිසිදු ආකාරයේ වෙනස් වීමක් ඔබ කිසිවිටෙකත් නොදකින්නෙහිය. තවද, අල්ලාහ්ගේ පිළිවෙතෙහි කිසිදු මාරු වීමක් ඔබ කිසිවිටෙකත් නොදකින්නෙහිය.

اَوَلَمۡ يَسِيۡرُوۡا فِى الۡاَرۡضِ فَيَنۡظُرُوۡا
كَيۡفَ كَانَ عَاقِبَةُ الَّذِيۡنَ مِنۡ قَبۡلِهِمۡ
وَكَانُوۡۤا اَشَدَّ مِنۡهُمۡ قُوَّةً ‌ؕ وَمَا كَانَ اللّٰهُ
لِيُعۡجِزَهٗ مِنۡ شَىۡءٍ فِى السَّمٰوٰتِ وَلَا
فِى الۡاَرۡضِ‌ ؕ اِنَّهٗ كَانَ عَلِيۡمًا قَدِيۡرًا ﴿٤٥﴾

45. ඔවුන් පොළොවෙහි සංචාරය නොකළේද? එසේනම් ඔවුන්ට පෙර සිටියවුන්ගේ අවසානය කෙසේ (නපුරු) වී දැයි ඔවුන්ට දැක ගන්නට තිබුණි. තවද, ඔවුන් මොවුන්ට වඩා බලයෙන් ශක්තිමත් වූහ. තවද, අල්ලාහ් කවරෙකු නම්, අහස්හි හෝ පොළොවෙහි හෝ ඇති ඕනෑම දෙයක් වුවද, ඔහුගේ (සැලසුම්) නිෂ්ඵල කිරීමට නොහැක. සැබැවින්ම ඔහු සියල්ල දන්නාය, බලසම්පන්නය.

وَلَوۡ يُؤَاخِذُ اللّٰهُ النَّاسَ بِمَا كَسَبُوۡا مَا
تَرَكَ عَلٰى ظَهۡرِهَا مِنۡ دَآبَّةٍ وَّلٰـكِنۡ
يُّؤَخِّرُهُمۡ اِلٰٓى اَجَلٍ مُّسَمًّى‌ ۚ فَاِذَا جَآءَ

46. තවද, අල්ලාහ් මිනිසුන්ට ඔවුන් කරන දේ සඳහා දඬුවම් පමුණුවන්නේ නම්, ඔහු කිසිදු ජීවියෙකුවත් (පොළෝ) තලයෙහි ඉතිරි නොකරනු ඇත. නමුත් ඔහු නියමිත කලකට ඔවුනට කාල අවකාශය දෙන්නේය. තවද, ඔවුන්ගේ නියමිත කාලය පැමිණෙන විට,

නියතවශයෙන්ම අල්ලාහ් ඔහුගේ දාසයින්ව මැනැවින් දකින්නාය.

اَجَلُهُمْ فَاِنَّ اللّٰهَ كَانَ بِعِبَادِهٖ بَصِيْرًا ﴿٤٥﴾




යාසීන්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰسٓ ②

2. යා, සීන්◆.

وَالْقُرْاٰنِ الْحَكِيْمِ ③

3. ප්‍රඥාවෙන් සපිරුණු කුර්ආන් මත දිවුරමින්.

اِنَّكَ لَمِنَ الْمُرْسَلِيْنَ ④

4. ඔබ ඇත්තෙන්ම දූතයින්ගෙන් (කෙනෙක්)ය.

عَلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ⑤

5. (ඔබ) ඍජු මාර්ගයෙහිය.

تَنْزِيْلَ الْعَزِيْزِ الرَّحِيْمِ ⑥

6. (මෙය) බලසම්පන්න මෙන්ම පරම දයාබරයාණන්ගෙන් පහළ වූවකි.

لِتُنْذِرَ قَوْمًا مَّآ اُنْذِرَ اٰبَآؤُهُمْ فَهُمْ غٰفِلُوْنَ ⑦

7. එය තම පියවරුන් අවවාද නොකරනු ලැබූ ජනතාව වෙත ඔබ අවවාද කරනු පිණිසය. තවද ඔවුන් නොසැලකිලිමත් වූහ.

لَقَدْ حَقَّ الْقَوْلُ عَلٰٓى اَكْثَرِهِمْ فَهُمْ لَا يُؤْمِنُوْنَ ⑧

8. නියතවශයෙන්ම (දේව) වචනය ඔවුන්ගෙන් බොහෝ අයට එරෙහිව සත්‍යය බවට තහවුරු වී ඇත. එබැවින් ඔවුන් විශ්වාස නොකරන්නෝය.

اِنَّا جَعَلْنَا فِيْٓ اَعْنَاقِهِمْ اَغْلٰلًا فَهِيَ اِلَى الْاَذْقَانِ فَهُمْ مُّقْمَحُوْنَ ⑨

9. අපි ඔවුනට හිස බලෙන් ඔසවාගෙන සිටින සේ ඔවුන්ගේ ගෙල වටා නිකට දක්වා ඇති කරපටි දැමුවෙමු.

وَجَعَلْنَا مِنْۢ بَيْنِ اَيْدِيْهِمْ سَدًّا وَّمِنْ خَلْفِهِمْ سَدًّا فَاَغْشَيْنٰهُمْ فَهُمْ لَا يُبْصِرُوْنَ ⑩

10. තවද අපි ඔවුන්ගේ ඉදිරිපසින් බාධකයක්ද ඔවුන්ගේ පිටුපසින් බාධකයක්ද ඇති කළෙමු. තවද ඔවුන්ව ආවරණය කළෙමු. එම නිසා ඔවුන්ට දැකිය නොහැක.

◆ එම්බල පරිපූර්ණ නායකයාණෙනි!

وَسَوَآءٌ عَلَيۡهِمۡ ءَاَنۡذَرۡتَهُمۡ اَمۡ لَمۡ تُنۡذِرۡهُمۡ لَا يُؤۡمِنُوۡنَ ﴿١١﴾

11. තවද ඔබ ඔවුනට අවවාද කළද ඔවුනට අවවාද නොකළද එය ඔවුනට එක හා සමානය. ඔවුන් විශ්වාස නොකරන්නෝය.

اِنَّمَا تُنۡذِرُ مَنِ اتَّبَعَ الذِّكۡرَ وَخَشِىَ الرَّحۡمٰنَ بِالۡغَيۡبِ‌ۚ فَبَشِّرۡهُ بِمَغۡفِرَةٍ وَّاَجۡرٍ كَرِيۡمٍ ﴿١٢﴾

12. ඔබට අවවාද කළ හැක්කේ අනුශාසනාව අනුගමනය කරන එමෙන්ම මහා කාරුණික වූ (දෙවියන් කෙරෙහි) රහසිගතව බිය වන අයට පමණි. එබැවින් ඔහුට සමාව සහ උදාර තිළිණය ගැන ශුභාරංචි දෙන්න.

اِنَّا نَحۡنُ نُحۡىِ الۡمَوۡتٰى وَنَكۡتُبُ مَا قَدَّمُوۡا وَاٰثَارَهُمۡ‌ؕ وَكُلَّ شَىۡءٍ اَحۡصَيۡنٰهُ فِىۡۤ اِمَامٍ مُّبِيۡنٍ ﴿١٣﴾

11. තවද ඔබ ඔවුනට අවවාද කළද ඔවුනට අවවාද නොකළද එය ඔවුනට එක හා සමානය. ඔවුන් විශ්වාස නොකරන්නෝය.

وَمَا عَلَيْنَآ اِلَّا الْبَلٰغُ الْمُبِيْنُ ﴿١٨﴾

18. තවද අපමත පැවරී ඇත්තේ (පණිවිඩය)පැහැදිලිව දන්වා සිටීම පමණි.

قَالُوْٓا اِنَّا تَطَيَّرْنَا بِكُمْ ۚ لَئِنْ لَّمْ تَنْتَهُوْا لَنَرْجُمَنَّكُمْ وَلَيَمَسَّنَّكُمْ مِّنَّا عَذَابٌ اَلِيْمٌ ﴿١٩﴾

19. ඔවුහු, 'නියතවශයෙන්ම අපි නුඹලාගෙන් අසුභ නිමිත්තක් ලෙස දකින්නෙමු. නුඹලා නොවැළකුණේ නම්, අපි සත්තකින්ම නුඹලාට ගල් ගැසීමේ දඬුවම දෙන්නෙමු. එමෙන්ම නුඹලාට අපගෙන් වේදනීය දඬුවමක්ද ලැබෙනු ඇතැ'යි කීහ.

قَالُوْا طَآئِرُكُمْ مَّعَكُمْ ؕ اَئِنْ ذُكِّرْتُمْ ؕ بَلْ اَنْتُمْ قَوْمٌ مُّسْرِفُوْنَ ﴿٢٠﴾

20. ඔවුහු (දූතයින්), 'නුඹලාගේ අසුභ නිමිත්ත නුඹලා සමගය. එය නුඹලා (පවසන්නේ) අනුශාසනා කරනු ලැබූ හේතුවෙන්ද? නොඑසේය, නුඹලා සියළු සීමාවන් ඉක්මවන්නාවූ ජනතාවක් වන්නෙහුයැ'යි පිළිතුරු දුන්හ.

وَجَآءَ مِنْ اَقْصَا الْمَدِيْنَةِ رَجُلٌ يَّسْعٰى قَالَ يٰقَوْمِ اتَّبِعُوا الْمُرْسَلِيْنَ ۙ ﴿٢١﴾

21. තවද නගරයේ ඈත පෙදෙසක සිට මිනිසෙක් දිව ඇවිත් ඔහු, 'එම්බල මාගේ ජනතාවනි! දූතයින්ව අනුගමනය කරනු'යි පැවසුවේය.

اتَّبِعُوْا مَنْ لَّا يَسْـَٔلُكُمْ اَجْرًا وَّهُمْ مُّهْتَدُوْنَ ﴿٢٢﴾

22. 'නුඹලාගෙන් කිසිදු තිළිණයක් නොඉල්ලන, එමෙන්ම යහමග පෙන්වනු ලැබූවාවූ ඔවුන්ව අනුගමනය කරනු'.

الجزء ٢٣

وَمَا لِيَ لَآ اَعْبُدُ الَّذِيْ فَطَرَنِيْ وَاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٢٣﴾

23-කොටස

23. 'තවද මාව මැවූවාවූ ඔහුට මා නැමදුම් නොකර සිටීමට මා හට කුමක් සිදු වුණේද? තවද නුඹලා ආපසු ගෙන එනු ලබන්නේ ඔහු වෙතටය'.

ءَاَتَّخِذُ مِنْ دُوْنِهٖٓ اٰلِهَةً اِنْ يُّرِدْنِ الرَّحْمٰنُ بِضُرٍّ لَّا تُغْنِ عَنِّيْ شَفَاعَتُهُمْ شَيْـًٔا وَّلَا يُنْقِذُوْنِ ۚ ﴿٢٤﴾

24. 'ඔහු හැර අන් අයව දෙවිවරුන් ලෙස මා ගන්නේද? මහා කාරුණික වූ (දෙවියන්) මා හට යම් හානියක් කිරීමට අදහස් කරන්නේ නම්, ඔවුන්ගේ මැදිහත්වීම මා හට කිසිදු ඵලක් නොවනු ඇත. තවද ඔවුනට මාව මුදා ගැනීමටද නොහැකිය'.

إِنِّيٓ إِذٗا لَّفِي ضَلَٰلٖ مُّبِينٍ ٢٥

25. 'එවන් අවස්ථාවක මම ඇත්තෙන්ම ප්‍රකට වරදෙහි වන්නෙමි'.

إِنِّيٓ ءَامَنتُ بِرَبِّكُمۡ فَٱسۡمَعُونِ ٢٦

26. 'මා නුඹලාගේ අධිපතියාණන් කෙරෙහි විශ්වාස කරමි. එබැවින් මා හට සවන් දෙනු'.

قِيلَ ٱدۡخُلِ ٱلۡجَنَّةَۖ قَالَ يَٰلَيۡتَ قَوۡمِي يَعۡلَمُونَ ٢٧

27. 'ස්වර්ගයට ඇතුළු වන්නැ'යි (ඔහුට) පවසන ලදී. ඔහු, 'අහෝ මාගේ ජනතාව දැන සිටියා නම්!'යැයි පැවසුවේය.

بِمَا غَفَرَ لِي رَبِّي وَجَعَلَنِي مِنَ ٱلۡمُكۡرَمِينَ ٢٨

28. 'මාගේ අධිපතියාණන් කෙතරම් (කාරුණිකව) මාහට ක්ෂමාව පිරිනමා, මාව ගෞරවයට පාත්‍ර වූ අයගෙන් කෙනෙකු ලෙස පත්කර ඇත්තේද!'.

وَمَآ أَنزَلۡنَا عَلَىٰ قَوۡمِهِۦ مِنۢ بَعۡدِهِۦ مِن جُندٖ مِّنَ ٱلسَّمَآءِ وَمَا كُنَّا مُنزِلِينَ ٢٩

29. තවද අපි ඔහුට පසුව ඔහුගේ ජනතාවට එරෙහිව අහසින් යම් සේනාවක් පහළ නොකළෙමු. තවද අපි (එවැන්නක්) පහළ කරන්නන්ද නොවේ.

إِن كَانَتۡ إِلَّا صَيۡحَةٗ وَٰحِدَةٗ فَإِذَا هُمۡ خَٰمِدُونَ ٣٠

30. නමුත් එය එක් පුපුරණ හඬක් විය. පසුව එසැනින්ම ඔවුන් (අළු බවට පත්වී) වැනසී ගියහ.

وقف غفران

يَٰحَسۡرَةً عَلَى ٱلۡعِبَادِۚ مَا يَأۡتِيهِم مِّن رَّسُولٍ إِلَّا كَانُواْ بِهِۦ يَسۡتَهۡزِءُونَ ٣١

31. අහෝ මානව වර්ගයා කෙරෙහි දුකකි! ඔවුන් වෙත කිසිම දූතයෙක් ඔවුන් ඔහුට සරදම් කළා මිස නොපැමිණියේය.

أَلَمۡ يَرَوۡاْ كَمۡ أَهۡلَكۡنَا قَبۡلَهُم مِّنَ ٱلۡقُرُونِ أَنَّهُمۡ إِلَيۡهِمۡ لَا يَرۡجِعُونَ ٣٢

32. මොවුන්ට පෙර අපි කොපමණ පරම්පරාවන් විනාශ කර ඇති බවත්, ඔවුන් මොවුන් වෙතට කිසිවිටෙකත් ආපසු නොපැමිණෙන බවත් මොවුන් දැක නොතිබේද?

وَإِن كُلّٞ لَّمَّا جَمِيعٞ لَّدَيۡنَا مُحۡضَرُونَ ٣٣

33. තවද ඔවුන් සියල්ල එක්රැස්ව, නියතවශයෙන්ම අප වෙතට ගෙන එනු ලබන්නෝය.

وَءَايَةٞ لَّهُمُ ٱلۡأَرۡضُ ٱلۡمَيۡتَةُ أَحۡيَيۡنَٰهَا

34. තවද මළානික වූ පොළොව ඔවුනට සළකුණකි. අපි එයට ජීවය

وَاَخۡرَجۡنَا مِنۡهَا حَبًّا فَمِنۡهُ يَاۡكُلُوۡنَ ٣٤

දී, එයින් ධාන්‍යය හට ගන්වන්නෙමු. එබැවින් ඔවුහු එයින් අනුභව කරති.

وَجَعَلۡنَا فِيۡهَا جَنّٰتٍ مِّنۡ نَّخِيۡلٍ وَّاَعۡنَابٍ وَّفَجَّرۡنَا فِيۡهَا مِنَ الۡعُيُوۡنِ ۙ ٣٥

35. තවද අපි එහි රටඉඳි සහ මිදි උයන්ද ඇති කළෙමු. තවද අපි එයින් ජල උල්පත් වේගයෙන් ගලා යෑමට සැලැස්වූයෙමු.

لِيَاۡكُلُوۡا مِنۡ ثَمَرِهٖ ۙ وَمَا عَمِلَتۡهُ اَيۡدِيۡهِمۡ ؕ اَفَلَا يَشۡكُرُوۡنَ ٣٦

36. එය ඔවුන් එහි පළතුරු අනුභව කරනු පිණිසය. තවද එය සෑදුවේ ඔවුන්ගේ අත් නොවේ. එසේනම් ඔවුන් කෘතඥ නොවන්නෝද?

سُبۡحٰنَ الَّذِىۡ خَلَقَ الۡاَزۡوَاجَ كُلَّهَا مِمَّا تُنۡۢبِتُ الۡاَرۡضُ وَمِنۡ اَنۡفُسِهِمۡ وَمِمَّا لَا يَعۡلَمُوۡنَ ٣٧

37. පොළොව හටගන්වන දෙයින්ද ඔවුන්ගෙන්ද ඔවුන් නොදන්නා දෙයින්ද යන සියල්ල ජෝඩු වශයෙන් මැවූ ඔහු සුවිශුද්ධය.

وَاٰيَةٌ لَّهُمُ الَّيۡلُ ۖۚ نَسۡلَخُ مِنۡهُ النَّهَارَ فَاِذَا هُمۡ مُّظۡلِمُوۡنَ ۙ ٣٨

38. තවද රාත්‍රිය ඔවුනට සළකුණකි. අපි එයින් දහවල ඉවතට ගන්නෙමු. තවද එසැනින්ම ඔවුහු අන්ධකාරයෙහිය.

وَالشَّمۡسُ تَجۡرِىۡ لِمُسۡتَقَرٍّ لَّهَا ؕ ذٰلِكَ تَقۡدِيۡرُ الۡعَزِيۡزِ الۡعَلِيۡمِ ؕ ٣٩

39. තවද හිරු එයට නියමිත පථයෙහි ගමන් ගන්නේය. එය බලසම්පන්න වූද සියල්ල දන්නා වූද (දෙවියන්ගේ) නියමය වේ.

وَالۡقَمَرَ قَدَّرۡنٰهُ مَنَازِلَ حَتّٰى عَادَ كَالۡعُرۡجُوۡنِ الۡقَدِيۡمِ ٤٠

40. එමෙන්ම සඳටද, එය රටඉඳි ගසේ පරණ අත්තක් බවට නැවත පත් වන තුරු අපි අවධියන් නියම කොට ඇත්තෙමු.

لَا الشَّمۡسُ يَنۡۢبَغِىۡ لَهَاۤ اَنۡ تُدۡرِكَ الۡقَمَرَ وَلَا الَّيۡلُ سَابِقُ النَّهَارِ ؕ وَكُلٌّ فِىۡ فَلَكٍ يَّسۡبَحُوۡنَ ٤١

41. හිරුට සඳ පසු කර යා නොහැක. තවද රාත්‍රියට දවාල අභිබවා යා නොහැක. මේ සියල්ල කක්ෂයක භ්‍රමණය වේ.

وَاٰيَةٌ لَّهُمۡ اَنَّا حَمَلۡنَا ذُرِّيَّتَهُمۡ فِى الۡفُلۡكِ

42. තවද පටවන ලද නැවෙහි අප ඔවුන්ගේ පැවත එන්නන්ව රැගෙන

الْمَشْحُوْنِ ﴿٤٢﴾

යාමද ඔවුනට සළකුණකි.

وَخَلَقْنَا لَهُمْ مِّنْ مِّثْلِهٖ مَا يَرْكَبُوْنَ ﴿٤٣﴾

43. ඔවුන් ගමන් කිරීමට ඔවුන් සඳහා (තවත්) එවැනි දේද අපි මවන්නෙමු.

وَاِنْ نَّشَاْ نُغْرِقْهُمْ فَلَا صَرِيْخَ لَهُمْ وَلَا هُمْ يُنْقَذُوْنَ ﴿٤٤﴾

44. තවද අප අභිමත වුයේ නම්, අපට ඔවුන්ව ගිල්වන්නට තිබුණි. පසුව (ඔවුන්ට) විපතේදී සහාය වන කිසිවෙකු නොවනු ඇත. තවද ඔවුන් මුදවාගනු නොලබන්නෝය.

اِلَّا رَحْمَةً مِّنَّا وَمَتَاعًا اِلٰى حِيْنٍ ﴿٤٥﴾

45. (එය) අපගෙන් වන දයාව මිස (නැත). ටික කලකට භුක්ති විඳීමක්ය.

وَاِذَا قِيْلَ لَهُمُ اتَّقُوْا مَا بَيْنَ اَيْدِيْكُمْ وَمَا خَلْفَكُمْ لَعَلَّكُمْ تُرْحَمُوْنَ ﴿٤٦﴾

46. තවද 'නුඹලා දයාව දක්වනු ලබනු පිණිස නුඹලාට ඉදිරියෙන් ඇති දෙයින්ද නුඹලාට පසුපසින් ඇති දෙයින්ද නුඹලාවම ආරක්ෂා කරගනු'යි ඔවුනට පැවසූ විට, (ඔවුන් ඉවත හැරෙන්නෝය)

وَمَا تَاْتِيْهِمْ مِّنْ اٰيَةٍ مِّنْ اٰيٰتِ رَبِّهِمْ اِلَّا كَانُوْا عَنْهَا مُعْرِضِيْنَ ﴿٤٧﴾

47. තවද ඔවුන්ගේ අධිපතියාණන්ගේ සළකුණු වලින් කිසිදු සළකුණක් ඔවුන් වෙත පැමිණියද, ඔවුන් එයින් පිටුපා යන්නෝය.

وَاِذَا قِيْلَ لَهُمْ اَنْفِقُوْا مِمَّا رَزَقَكُمُ اللّٰهُ ۙ قَالَ الَّذِيْنَ كَفَرُوْا لِلَّذِيْنَ اٰمَنُوْٓا اَنُطْعِمُ مَنْ لَّوْ يَشَآءُ اللّٰهُ اَطْعَمَهٗٓ ۖ اِنْ اَنْتُمْ اِلَّا فِيْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٤٨﴾

48. තවද 'අල්ලාහ් නුඹලාට සපයා දී ඇති දැයින් වියදම් කරනු'යි ඔවුනට පවසනු ලැබූ කල්හි, අවිශ්වාස කරන අය විශ්වාස කරන අය වෙත, 'අල්ලාහ් කවරෙකුට අභිමත වී, ආහාර දී තිබේද ඔහුට අප ආහාර දිය යුතුදැ?'යි පවසති.

وَيَقُوْلُوْنَ مَتٰى هٰذَا الْوَعْدُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٤٩﴾

49. තවද 'නුඹලා සත්‍යවාදීන් වේ නම්, එම පොරොන්දුව (ඉටුවන්නේ) කවදාදැ?'යි ඔවුන් අසති.

مَا يَنْظُرُوْنَ اِلَّا صَيْحَةً وَّاحِدَةً تَاْخُذُهُمْ وَهُمْ يَخِصِّمُوْنَ ﴿٥٠﴾

50. ඔවුන් බලාපොරොත්තු වන්නේ, ඔවුන් වාද කරමින් සිටින විටදී ඔවුන්ව හසුකරගන්නා වූ එක් පුපුරන හඬක් මිස නැත.

فَلَا يَسْتَطِيعُونَ تَوْصِيَةً وَّلَآ إِلَىٰٓ أَهْلِهِمْ يَرْجِعُونَ ﴿٥١﴾ ع

51. පසුව ඔවුන්ට අන්තිම කැමැත්ත නිම කරවා ගැනීමට නොහැකි වනු ඇත. තවද ඔවුන්ට තමන්ගේ පවුල් කරා ආපසු යෑමටද නොහැකි වනු ඇත.

وَنُفِخَ فِى ٱلصُّورِ فَإِذَا هُم مِّنَ ٱلْأَجْدَاثِ إِلَىٰ رَبِّهِمْ يَنسِلُونَ ﴿٥٢﴾

52. තවද සූර් (නලාව) පිඹිනු ලබන්නේය. එවිට එසැනින්ම ඔවුන් සොහොන්වල සිට තමන්ගේ අධිපතියාණන් වෙතට යුහුසුළුව යන්නෝය.

قَالُوا۟ يَـٰوَيْلَنَا مَنۢ بَعَثَنَا مِن مَّرْقَدِنَا ۜ هَـٰذَا مَا وَعَدَ ٱلرَّحْمَـٰنُ وَصَدَقَ ٱلْمُرْسَلُونَ ﴿٥٣﴾

53. ඔවුහු, 'අහෝ! අපට වූ විපත! අපගේ නිදන ස්ථානයෙන් අපව නැගිටුවා ඇත්තේ කවුරුන්ද? මහා කාරුණික වූ(දෙවියන්) පොරොන්දු වූ දේ මෙය වේ. තවද දූතයින් සත්‍යයම පැවසුහැ'යි පවසන්නෝය.

إِن كَانَتْ إِلَّا صَيْحَةً وَٰحِدَةً فَإِذَا هُمْ جَمِيعٌ لَّدَيْنَا مُحْضَرُونَ ﴿٥٤﴾

54. එය එක් පුපුරන හඬක් මිස නැත. තවද එසැනින්ම, ඔවුන් අප ඉදිරියට ගෙන එනු ලබන්නෝය.

فَٱلْيَوْمَ لَا تُظْلَمُ نَفْسٌ شَيْـًٔا وَلَا تُجْزَوْنَ إِلَّا مَا كُنتُمْ تَعْمَلُونَ ﴿٥٥﴾

55. තවද එදිනෙහිදී කිසිදු ආත්මයකට අල්ප මාත්‍රයක්වත් වරද නොකරනු ලබන්නේය. තවද නුඹලා කරමින් සිටි දේට අනුව මිස තිළිණ දෙනු ලබන්නේද නැත.

إِنَّ أَصْحَـٰبَ ٱلْجَنَّةِ ٱلْيَوْمَ فِى شُغُلٍ فَـٰكِهُونَ ﴿٥٦﴾

56. සැබැවින්ම ස්වර්ගයේ වැසියන්, එදින විවිධ සිත්ගන්නා දේවල්වලින් ප්‍රමෝදමත් වන්නෝය.

هُمْ وَأَزْوَٰجُهُمْ فِى ظِلَـٰلٍ عَلَى ٱلْأَرَآئِكِ مُتَّكِـُٔونَ ﴿٥٧﴾

57. ඔවුන් සහ ඔවුන්ගේ සහකරුවන් ප්‍රසන්න වූ සෙවණෙහි උසස් සෝපාවන්හි හාන්සි වී සිටින්නෝය.

لَهُمْ فِيهَا فَـٰكِهَةٌ وَلَهُم مَّا يَدَّعُونَ ﴿٥٨﴾

58. ඔවුන්ට එහි පළතුරු ඇත. තවද ඔවුන් පතන ඕනෑම දෙයක්ද ඔවුන්ට ලැබෙනු ඇත.

سَلَـٰمٌ قَوْلًا مِّن رَّبٍّ رَّحِيمٍ ﴿٥٩﴾

59. 'සාමය අත්වේවා'යි පරම දයාබර අධිපතියාණන් වෙතින් (ඔවුනට) සුභ පතනු ලබන්නේය.

وَامْتَازُوا الْيَوْمَ اَيُّهَا الْمُجْرِمُوْنَ ٦٠

60. තවද (දෙවියන්) 'එම්බල වරදකරුවනි! මෙදින නුඹලා (ධාර්මිෂ්ඨකයින්ගෙන්) වෙන් වනු'(යි පවසනු ඇත.)

اَلَمْ اَعْهَدْ اِلَيْكُمْ يٰبَنِىْٓ اٰدَمَ اَنْ لَّا تَعْبُدُوا الشَّيْطٰنَ ۚ اِنَّهٗ لَكُمْ عَدُوٌّ مُّبِيْنٌ ۙ ٦١

61. 'එම්බල ආදම්ගේ පුත්‍රයිනි! නුඹලා ෂෙයිතාන්ට නොවඳිනුයි මා නුඹලාට නියෝග නොකළේද? නියතවශයෙන්ම ඔහු නුඹලාට විවෘත සතුරෙකි'.

وَّاَنِ اعْبُدُوْنِىْ ؕ هٰذَا صِرَاطٌ مُّسْتَقِيْمٌ ٦٢

وقف غفران

62. 'තවද නුඹලා මා නමදිනු. සෘජු මාර්ගය මෙය වේ(යැයි මා නුඹලාට නියෝග නොකළේද?)'

وَلَقَدْ اَضَلَّ مِنْكُمْ جِبِلًّا كَثِيْرًا ؕ اَفَلَمْ تَكُوْنُوْا تَعْقِلُوْنَ ٦٣

63. 'තවද ඔහු නුඹලාගෙන් විශාල සමූහයක් නොමග යැවීය. එසේ නම් නුඹලා තේරුම් නොගත්තේ මන්ද?'

هٰذِهٖ جَهَنَّمُ الَّتِىْ كُنْتُمْ تُوْعَدُوْنَ ٦٤

64. 'නුඹලාට පොරොන්දු වූ නිරය මෙය වේ'.

اِصْلَوْهَا الْيَوْمَ بِمَا كُنْتُمْ تَكْفُرُوْنَ ٦٥

65. 'නුඹලා අවිශ්වාස කළ බැවින් මෙදින එහි පිවිසෙනු'.

اَلْيَوْمَ نَخْتِمُ عَلٰٓى اَفْوَاهِهِمْ وَتُكَلِّمُنَآ اَيْدِيْهِمْ وَتَشْهَدُ اَرْجُلُهُمْ بِمَا كَانُوْا يَكْسِبُوْنَ ٦٦

66. මෙදින අපි ඔවුන්ගේ මුඛයන්හි මුද්‍රා තබන්නෙමු. තවද ඔවුන්ගේ අත් අපිට කථා කරනු ඇත. තවද ඔවුන්ගේ පාදයන් ඔවුන් ඉපැයූ දෙයට සාක්ෂි දරනු ඇත.

وَلَوْ نَشَآءُ لَطَمَسْنَا عَلٰٓى اَعْيُنِهِمْ فَاسْتَبَقُوا الصِّرَاطَ فَاَنّٰى يُبْصِرُوْنَ ٦٧

67. තවද අප අභිමත වූයේ නම්, අපට ඔවුන්ගේ ඇස් නැති කිරීමට තිබුණි. එවිට ඔවුන් මග (සොයන්නට) කඩිනම් වනු ඇත. නමුත් ඔවුන්ට කෙසේ දකින්නට හැකි වේද?

وَلَوْ نَشَآءُ لَمَسَخْنٰهُمْ عَلٰى مَكَانَتِهِمْ فَمَا

68. තවද අප අභිමත වූයේ නම්, ඔවුන්ගේ ස්ථානයන්හි (ඔවුන් නොසැලී සිටින ආකාරයට) අපට

اسْتَطَاعُوْا مُضِيًّا وَّلَا يَرْجِعُوْنَ ﴿٦٨﴾

ඔවුන්ව වෙනස් කිරීමට තිබිණි. එවිට ඔවුන්ට ඉදිරියට යෑමට හෝ ආපසු හැරී යෑමට නොහැකි වනු ඇත.

وَمَنْ نُّعَمِّرْهُ نُنَكِّسْهُ فِي الْخَلْقِ ؕ اَفَلَا يَعْقِلُوْنَ ﴿٦٩﴾

69. තවද අපි කවරෙකුට දීර්ඝායුෂ ලබා දෙන්නේද, ඔහුව අපි මුහුකුරා ගිය තත්වයට පත් කරන්නෙමු. එසේ නම් ඔවුන් තේරුම් නොගන්නේද?

وَمَا عَلَّمْنٰهُ الشِّعْرَ وَمَا يَنْۢبَغِيْ لَهٗ ؕ اِنْ هُوَ اِلَّا ذِكْرٌ وَّقُرْاٰنٌ مُّبِيْنٌ ﴿٧٠﴾

70. තවද අපි ඔහුට කාව්‍ය ශාස්ත්‍රය නොඉගැන්වීමු. එමෙන්ම එය ඔහුට යෝග්‍යද නැත. එය නම් අනුශාසනාවක් මෙන්ම (කරුණු) පැහැදිලි කරන්නාවූ කුර්ආනය පමණි.

لِّيُنْذِرَ مَنْ كَانَ حَيًّا وَّيَحِقَّ الْقَوْلُ عَلَى الْكٰفِرِيْنَ ﴿٧١﴾

71. එබැවින් ජීවතුන් අතර සිටින සියල්ලන්ට එය අවවාද කරනු පිණිසද අවිශ්වාසිතයින්ට එරෙහිව (අල්ලාහ්ගේ) නියමය ඉටුවනු පිණිසද වේ.

اَوَلَمْ يَرَوْا اَنَّا خَلَقْنَا لَهُمْ مِّمَّا عَمِلَتْ اَيْدِيْنَآ اَنْعَامًا فَهُمْ لَهَا مٰلِكُوْنَ ﴿٧٢﴾

72. අපගේ අත්වලින් හැඩ ගස්වා ඇති දේවල් අතර අප ඔවුන් වෙනුවෙන් මවා ඇති ගව සතුන්ව ඔවුන් නොදකින්නේද? එබැවින් ඔවුන් උන්ගේ හිමියන්ය.

وَذَلَّلْنٰهَا لَهُمْ فَمِنْهَا رَكُوْبُهُمْ وَمِنْهَا يَاْكُلُوْنَ ﴿٧٣﴾

73. තවද අපි උන්ව ඔවුන්ට යටත් කර දුන්නෙමු. එබැවින් උන්ගෙන් සමහරුන්ව ඔවුන් ගමන් යෑමට යොදා ගනිති. තවද (තවත්) සමහරුන්ව ඔවුන් අනුභව කරති.

وَلَهُمْ فِيْهَا مَنَافِعُ وَمَشَارِبُ ؕ اَفَلَا يَشْكُرُوْنَ ﴿٧٤﴾

74. තවද උන්ගෙන් ඔවුන්ට වෙනත් ප්‍රයෝජනද (එමෙන්ම) පානයන්ද ඇත. එසේනම් ඔවුන් කෘතඥද නොවන්නෝද?

وَاتَّخَذُوْا مِنْ دُوْنِ اللّٰهِ اٰلِهَةً لَّعَلَّهُمْ يُنْصَرُوْنَ ﴿٧٥﴾

75. තවද ඔවුහු තමන්ට උදව් ලැබෙනු ඇතැයි අල්ලාහ් හැර (අන්) දෙවිවරුන්ව (නැමදීමට) ගත්හ.

لَا يَسْتَطِيْعُوْنَ نَصْرَهُمْ ۙ وَهُمْ لَهُمْ

76. ඔවුන්ට උදව් කිරීමට (දෙවිවරුන් වන) මොවුන්ට නොහැකිය. මොවුන්ද ඔවුන් සමග

جُندٌ مُّحْضَرُونَ ٧٦

සේනාවන් ලෙස (අල්ලාහ් ඉදිරියේ) පෙනී සිටීමට සලස්වනු ලබන්නෝය.

وقف لازم

فَلَا يَحْزُنكَ قَوْلُهُمْ ۘ إِنَّا نَعْلَمُ مَا يُسِرُّونَ وَمَا يُعْلِنُونَ ٧٧

77. එබැවින් ඔවුන්ගේ කථාව ඔබව ශෝකයට පත් නොකරත්වා. ඔවුන් සඟවන දේද ඔවුන් එළිපිට ප්‍රකාශ කරන දේද නියතවශයෙන්ම අපි දනිමු.

أَوَلَمْ يَرَ الْإِنسَانُ أَنَّا خَلَقْنَاهُ مِن نُّطْفَةٍ فَإِذَا هُوَ خَصِيمٌ مُّبِينٌ ٧٨

78. මිනිසා, තමාව (හුදෙක්) ශුක්‍ර බිඳුවකින් අප මවා ඇත්තේ යැයි නොදකින්නේද? එහෙත් බලනු! ඔහු ප්‍රකට කලහකරුවෙක් වන්නේය.

وَضَرَبَ لَنَا مَثَلًا وَنَسِيَ خَلْقَهُ ۖ قَالَ مَن يُحْيِي الْعِظَامَ وَهِيَ رَمِيمٌ ٧٩

79. තවද ඔහු අපට උපමාවන් ප්‍රබන්ධ කරන්නේය. තවද ඔහු තමන්ගේම මැවීම ගැන අමතක කරන්නේය. 'අස්ථි දිරාපත් වූවාට පසු ජීවය දෙන්නේ කවුරුන්ද?'යි ඔහු කියන්නේය.

قُلْ يُحْيِيهَا الَّذِي أَنشَأَهَا أَوَّلَ مَرَّةٍ ۖ وَهُوَ بِكُلِّ خَلْقٍ عَلِيمٌ ٨٠

80. පවසන්න, 'ඒවා පළමු වරට මැවූ ඔහුම ඒවාට ජීවය දෙන්නේය. තවද ඔහු සියළු(වර්ගයේ) මැවීම් ගැන ඉතා මැනැවින් දන්නේය'.

الَّذِي جَعَلَ لَكُم مِّنَ الشَّجَرِ الْأَخْضَرِ نَارًا فَإِذَا أَنتُم مِّنْهُ تُوقِدُونَ ٨١

81. 'කොළපැහැ ගසින් නුඹලා වෙනුවෙන් ගින්න නිපදවන්නේ ඔහුය. තවද බලව, නුඹලා එයින් ගින්දර දල්වන්නෙහුය'.

وقف غفران

أَوَلَيْسَ الَّذِي خَلَقَ السَّمَاوَاتِ وَالْأَرْضَ بِقَادِرٍ عَلَىٰ أَن يَخْلُقَ مِثْلَهُم ۚ بَلَىٰ وَهُوَ الْخَلَّاقُ الْعَلِيمُ ٨٢

82. 'අහස් සහ පොළොව මවා ඇති ඔහුට ඔවුන් වැනි අයව මැවීමට බලය නැත්තේද? නොඑසේය. තවද ඔහු ඇත්තෙන්ම ශ්‍රේෂ්ඨ මැවුම්කරුවාණන්ය, සියල්ල දන්නාය'.

إِنَّمَا أَمْرُهُ إِذَا أَرَادَ شَيْئًا أَن يَقُولَ لَهُ كُن فَيَكُونُ ٨٣

83. සැබැවින්ම ඔහුගේ විධානය ඔහු යමක් අදහස් කරන විට, ඔහු එයට 'වනු'යි කියූ පමණින් එය වීමට පටන් ගනියි.

فَسُبْحَانَ الَّذِي بِيَدِهِ مَلَكُوتُ كُلِّ شَيْءٍ

84. එබැවින් කවරෙකුගේ අතෙහි සියළු දෑයෙහි අධිරාජ්‍යය තිබේද, ඔහුම සුවිශුද්ධය. තවද නුඹලා

وَّاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٨٤﴾

(සියල්ල) ඔහු වෙතටම ආපසු ගෙන එනු ලබන්නෙහුය.




අල් සාෆ්ෆාත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالصّٰٓفّٰتِ صَفًّا ②

2. ශ්‍රේණිවලට පෙළ ගස්වා සිටින්නන් මත දිවුරමින්.

فَالزّٰجِرٰتِ زَجۡرًا ③

3. තවද සතුරන්ව ශක්තිමත්ව පලවා හරින්නවුන් මතද,

فَالتّٰلِيٰتِ ذِكۡرًا ④

4. තවද (මෙම කුර්ආන්) අනුශාසනාව පාරායනය කරන්නන් මතද,

اِنَّ اِلٰهَكُمۡ لَوَاحِدٌ ⑤

5. නියතවශයෙන්ම නුඹලාගේ දෙවියා එක්කෙනෙක්ය.

رَبُّ السَّمٰوٰتِ وَالۡاَرۡضِ وَمَا بَيۡنَهُمَا وَرَبُّ الۡمَشَارِقِ ⑥

6. අහස්හිද පොළොවෙහිද එමෙන්ම ඒ දෙක අතර ඇති සියල්ලන්ටම (ඔහු) අධිපතියාණන්ය. තවද හිරු උදාවන තැන්වලටද අධිපතියාණන්ය.

اِنَّا زَيَّنَّا السَّمَآءَ الدُّنۡيَا بِزِيۡنَةِ الۡكَوَاكِبِ ⑦

7. පහළම අහස් තලය අපි තාරකාවන්ගේ අලංකාරයෙන් සරසා ඇත්තෙමු.

وَحِفۡظًا مِّنۡ كُلِّ شَيۡطٰنٍ مَّارِدٍ ⑧

8. තවද එය සියළු කැරලිකාර ෂෙයිතාන්ගෙන් සුරක්ෂිතය.

لَا يَسَّمَّعُوۡنَ اِلَى الۡمَلَاِ الۡاَعۡلٰى وَيُقۡذَفُوۡنَ مِنۡ كُلِّ جَانِبٍ ⑨

9. අති උසස් සභාවට සවන් දීමට ඔවුන්ට (ෂෙයිතානුන්ට) නොහැකි වනු ඇත. තවද සියළු දෙසින්ම ඔවුන්ට පහර දෙනු ලබන්නේය.

دُحُوۡرًا وَّلَهُمۡ عَذَابٌ وَّاصِبٌ ⑩

10. පලවා හරින ලද්දන්ය. තවද ඔවුන්ට නිරන්තර දඬුවමක් ඇත.

اِلَّا مَنۡ خَطِفَ الۡخَطۡفَةَ فَاَتۡبَعَهٗ

11. එහෙත් කවුරුන් හෝ හොරෙන් (යම් දෙයක්) පැහැර ගෙන යන්නේ නම්, එවිට තියුණු ගිනි දැල්ලක් ඔහුව

شِهَابٌ ثَاقِبٌ ﴿١١﴾

ලුහු බඳිනු ඇත.

فَاسْتَفْتِهِمْ أَهُمْ أَشَدُّ خَلْقًا أَمْ مَّنْ خَلَقْنَا ۚ إِنَّا خَلَقْنَاهُم مِّن طِينٍ لَّازِبٍ ﴿١٢﴾

12. එසේනම් මැවීම් අතින් වඩා ශක්තිමත් ඔවුන්ද නැතහොත් අප මැවූ අයදැ?යි ඔවුන්ගෙන් අසන්න. නියතවශයෙන්ම අපි ඔවුන්ව ඇලෙන සුළු මැටි පසින් මවා ඇත්තෙමු.

بَلْ عَجِبْتَ وَيَسْخَرُونَ ﴿١٣﴾

13. නොඑසේය, ඔබ මවිත වන්නෙහිය. තවද ඔවුන් සරදම් කරන්නෝය.

وَإِذَا ذُكِّرُوا لَا يَذْكُرُونَ ﴿١٤﴾

14. තවද ඔවුන්ට අනුශාසනා කරනු ලැබූ විට ඔවුහු නොතකන්නෝය.

وَإِذَا رَأَوْا آيَةً يَسْتَسْخِرُونَ ﴿١٥﴾

15. තවද ඔවුන් සළකුණක් දකින විට, ඔවුන් එයට සරදම් කිරීමට තැත් කරන්නෝය.

وَقَالُوا إِنْ هَٰذَا إِلَّا سِحْرٌ مُّبِينٌ ﴿١٦﴾

16. තවද ඔවුන්, 'මෙය පැහැදලි මායාවක් මිස අන් කිසිවක් නොවේයැ'යි පවසන්නෝය.

أَإِذَا مِتْنَا وَكُنَّا تُرَابًا وَعِظَامًا أَإِنَّا لَمَبْعُوثُونَ ﴿١٧﴾

17. 'කිමද! අප මරණයට පත් වී පස් දූවිලි සහ ඇටකටු බවටද පත්වූ පසු (නැවතත්) අපි නැගිටවනු ලබන්නෙමුද?'

أَوَآبَاؤُنَا الْأَوَّلُونَ ﴿١٨﴾

18. 'එමෙන්ම පෙර විසූ අපගේ පියවරුන් (පවා)ද?'

قُلْ نَعَمْ وَأَنتُمْ دَاخِرُونَ ﴿١٩﴾

19. පවසන්න, 'එසේය, තවද (එවිට) නුඹලා අවමානයට පත්වන්නන්ය'.

فَإِنَّمَا هِيَ زَجْرَةٌ وَاحِدَةٌ فَإِذَا هُمْ يَنظُرُونَ ﴿٢٠﴾

20. එවිට එය එක් සැර හඬක් වන්නේය. තවද එසැනින්ම ඔවුන් දකින්නට පටන් ගනු ඇත.

وَقَالُوا يَا وَيْلَنَا هَٰذَا يَوْمُ الدِّينِ ﴿٢١﴾

21. තවද 'අහෝ අපට වූ විපත! මෙය ඵලවිපාක දෙන්නාවූ දිනයක්යැ'යි ඔවුන් කියනු ඇත.

هَٰذَا يَوْمُ الْفَصْلِ الَّذِي كُنتُم بِهِ تُكَذِّبُونَ ﴿٢٢﴾

22. 'නුඹලා ප්‍රතික්ෂේප කරමින් සිටි, (අවසන්) තිරණාත්මක දිනය මෙය වේ'(යැයි කියනු ලබන්නේය).

اُحْشُرُوا الَّذِيْنَ ظَلَمُوْا وَاَزْوَاجَهُمْ وَمَا كَانُوْا يَعْبُدُوْنَ ﴿٢٣﴾

23. 'වැරදි ලෙස ක්‍රියා කළ අයවද ඔවුන්ගේ සගයින්වද තවද ඔවුන් වැඳුම් කළ දේද එක් රැස් කරනු'(යි සුර දූතයන්හට පවසනු ලැබේ).

مِنْ دُوْنِ اللّٰهِ فَاهْدُوْهُمْ اِلٰى صِرَاطِ الْجَحِيْمِ ﴿٢٤﴾

24. '(ඔවුන් නැමදුම් කළේ) අල්ලාහ් හැරය. තවද ඔවුන්ව (නිරා)ගින්නේ මාර්ගයට යොමු කරනු'.

وَقِفُوْهُمْ اِنَّهُمْ مَّسْـُٔوْلُوْنَ ﴿٢٥﴾

25. 'තවද ඔවුන්ව නවත්වා තබනු. නියතවශයෙන්ම ඔවුන්ගෙන් ප්‍රශ්ණ කරනු ලබන්නේය'.

مَا لَكُمْ لَا تَنَاصَرُوْنَ ﴿٢٦﴾

26. 'නුඹලා එකිනෙකාට උදව් නොකර සිටීමට නුඹලාට කුමක් සිදු වූයේද?'

بَلْ هُمُ الْيَوْمَ مُسْتَسْلِمُوْنَ ﴿٢٧﴾

27. එහෙත් එදින ඔවුන්ම යටත් වනු ඇත.

وَاَقْبَلَ بَعْضُهُمْ عَلٰى بَعْضٍ يَّتَسَآءَلُوْنَ ﴿٢٨﴾

28. තවද ඔවුන්ගෙන් සමහරුන් සමහරුන් වෙත ප්‍රශ්න කරමින් හැරෙන්නෝය.

قَالُوْٓا اِنَّكُمْ كُنْتُمْ تَاْتُوْنَنَا عَنِ الْيَمِيْنِ ﴿٢٩﴾

29. ඔවුහු, 'සැබැවින්ම නුඹලා අපගේ දකුණු පසින් පැමිණ සිටියෙහුයැ'යි කියන්නෝය.

قَالُوْا بَلْ لَّمْ تَكُوْنُوْا مُؤْمِنِيْنَ ﴿٣٠﴾

30. එයට මොවුහු, 'නොඑසේය, නුඹලා විශ්වාසිතයින්ව නොසිටියෙහු යැ'යි පිළිතුරු දෙන්නෝය.

وَمَا كَانَ لَنَا عَلَيْكُمْ مِّنْ سُلْطٰنٍ ۚ بَلْ كُنْتُمْ قَوْمًا طٰغِيْنَ ﴿٣١﴾

31. 'තවද අපට නුඹලා කෙරෙහි බලයක් නොතිබුණි. නමුත් නුඹලාම සීමාව ඉක්මවූ ජනතාවක් වූවෙහුය'.

فَحَقَّ عَلَيْنَا قَوْلُ رَبِّنَآ ۖ اِنَّا لَذَآئِقُوْنَ ﴿٣٢﴾

32. 'අප නියතවශයෙන්ම (දඬුවම) විඳිය යුතුය යන අපගේ අධිපතියාණන්ගේ වදන අපට එරෙහිව තහවුරු වී ඇත'.

فَاَغْوَيْنٰكُمْ اِنَّا كُنَّا غٰوِيْنَ ﴿٣٣﴾

33. 'තවද අපම නොමග ගොස් සිටි බැවින් අපි නුඹලාවද නොමග යැව්වෙමු'.

فَاِنَّهُمۡ يَوۡمَٮِٕذٍ فِى الۡعَذَابِ مُشۡتَرِكُوۡنَ ۝٣٤

34. ඇත්තෙන්ම එදිනෙහිදී ඔවුන් (සියල්ල) දඬුවමෙහි කොටස්කරුවන් වනු ඇත.

اِنَّا كَذٰلِكَ نَفۡعَلُ بِالۡمُجۡرِمِيۡنَ ۝٣٥

35. සැබැවින්ම අපි වරදකරුවන් සමග මෙසේ කටයුතු කරන්නෙමු.

اِنَّهُمۡ كَانُوۡۤا اِذَا قِيۡلَ لَهُمۡ لَاۤ اِلٰهَ اِلَّا اللّٰهُ ۙ يَسۡتَكۡبِرُوۡنَ ۙ ۝٣٦

36. මන්ද, 'නැමදීමට සුදුසසා අල්ලාහ් හැර අන් කිසිවෙකු නැත'යි ඔවුනට පවසනු ලැබූ විට ඔවුන් උඩඟුවෙන් ඉවත හැරුණහ.

وَيَقُوۡلُوۡنَ اَٮِٕنَّا لَتَارِكُوۡۤا اٰلِهَتِنَا لِشَاعِرٍ مَّجۡنُوۡنٍ ؕ ۝٣٧

37. තවද 'උමතු කවියෙකු වෙනුවෙන් අපගේ දෙවිවරුන්ව අපි අත්හරින්නෙමුදැ?'යි කීහ.

بَلۡ جَآءَ بِالۡحَـقِّ وَصَدَّقَ الۡمُرۡسَلِيۡنَ ۝٣٨

38. නොඑසේය, ඔහු සත්‍යය ගෙන ආවේය. තවද (සියළු) දූතයින්ගේ සත්‍යතාවයද තහවුරු කළේය.

اِنَّكُمۡ لَذَآٮِٕقُوا الۡعَذَابِ الۡاَلِيۡمِ ۚ ۝٣٩

39. නියතවශයෙන්ම නුඹලා වේදනීය දඬුවම විඳින්නෙහුය.

وَمَا تُجۡزَوۡنَ اِلَّا مَا كُنۡتُمۡ تَعۡمَلُوۡنَ ۙ ۝٤٠

40. තවද නුඹලා ඵලවිපාක ලබන්නේ නුඹලා කරමින් සිටි දේට පමණි.

اِلَّا عِبَادَ اللّٰهِ الۡمُخۡلَصِيۡنَ ۝٤١

41. තෝරාගන්නා ලද අල්ලාහ්ගේ දාසයින් හැරෙන්නටය.

اُولٰٓٮِٕكَ لَهُمۡ رِزۡقٌ مَّعۡلُوۡمٌ ۙ ۝٤٢

42. මොවුන්ට නියමිත ජීවනෝපාය ලැබෙනු ඇත.

فَوَاكِهُ ۚ وَهُمۡ مُّكۡرَمُوۡنَ ۙ ۝٤٣

43. පළතුරුය, තවද ඔවුහු ගෞරව කරනු ලබන්නෝය.

فِىۡ جَنّٰتِ النَّعِيۡمِ ۙ ۝٤٤

44. දිව්‍ය සැපතින් යුක්ත වූ උද්‍යයානයන්හිය.

عَلٰى سُرُرٍ مُّتَقٰبِلِيۡنَ ۝٤٥

45. සිහසුන් මත එකිනෙකාට මුහුණලා (සිටින්නෝ)ය.

يُطَافُ عَلَيۡهِمۡ بِكَاۡسٍ مِّنۡ مَّعِيۡنٍ ۙ ۝٤٦

46. ගලායන දිය උල්පතින් පිරුණු බඳුන් ඔවුන් වටා යවනු ලබන්නේය.

بَيۡضَآءَ لَذَّةٍ لِّلشّٰرِبِيۡنَ ۚ ۝٤٧

47. (බැබළෙන) සුදුය. පානය කරන්නන්ට ප්‍රණීතය.

لَا فِيهَا غَوْلٌ وَّلَا هُمْ عَنْهَا يُنْزَفُوْنَ ﴿٤٨﴾

48. එහි කිසිදු මත්වීමක්ද නොවනු ඇත. තවද ඔවුන් එමගින් සිහිසුන් වන්නේද නැත.

وَعِنْدَهُمْ قٰصِرٰتُ الطَّرْفِ عِيْنٌ ﴿٤٩﴾

49. තවද පහතට හෙළන ලද බැල්මෙන් යුත් අලංකාර පුළුල් නෙත් ඇති (පතිවත් රකින) ස්ත්‍රීන් ඔවුන් සමග වන්නෝය.

كَاَنَّهُنَّ بَيْضٌ مَّكْنُوْنٌ ﴿٥٠﴾

50. ඔවුන් ආවරණය කරන ලද බිත්තර බඳුය.

فَاَقْبَلَ بَعْضُهُمْ عَلٰى بَعْضٍ يَّتَسَآءَلُوْنَ ﴿٥١﴾

51. තවද ඔවුන්ගෙන් සමහරුන් සමහරුන්ගෙන් මුහුණට මුහුණලා විචාරති.

قَالَ قَآئِلٌ مِّنْهُمْ اِنِّىْ كَانَ لِىْ قَرِيْنٌ ﴿٥٢﴾

52. ඔවුන් අතරින් කථාකරන්නෙක් "මට සගයෙකු සිටියේයැ"යි කියනු ඇත.

يَّقُوْلُ اَئِنَّكَ لَمِنَ الْمُصَدِّقِيْنَ ﴿٥٣﴾

53. "හෙතෙම (මෙසේ) පවසමින් සිටියේය. 'නුඹ (එය) සත්‍යය යැයි පිළිගන්නන් අතරින් කෙනෙක්ද?'

ءَاِذَا مِتْنَا وَكُنَّا تُرَابًا وَّعِظَامًا ءَاِنَّا لَمَدِيْنُوْنَ ﴿٥٤﴾

54. (තවද) 'අපි මරණයට පත් වී පස් දූවිලි සහ ඇටකටු බවට පත් වූ පසුවත් ඇත්තෙන්ම අපි ඵල විපාක දෙනු ලබන්නෙමුද?'"

قَالَ هَلْ اَنْتُمْ مُّطَّلِعُوْنَ ﴿٥٥﴾

55. ඔහු, 'නුඹලා (හෙතෙමව) එබී බලන්නන්ද?'යි කියනු ඇත.

فَاطَّلَعَ فَرَاٰهُ فِىْ سَوَآءِ الْجَحِيْمِ ﴿٥٦﴾

56. පසුව ඔහු එබී බලනු ඇත. තවද හෙතෙමව (නිරා) ගින්නේ මධ්‍යයෙහි සිටිනු ඔහු දකිනු ඇත.

قَالَ تَاللّٰهِ اِنْ كِدْتَّ لَتُرْدِيْنِ ﴿٥٧﴾

57. 'අල්ලාහ් සාක්කි! නුඹ මාවත් විනාශ කිරීමට තැත් කළේයැ'යි ඔහු කියනු ඇත.

وَلَوْلَا نِعْمَةُ رَبِّىْ لَكُنْتُ مِنَ الْمُحْضَرِيْنَ ﴿٥٨﴾

58. 'තවද මාගේ අධිපතියාණන්ගේ ආශිර්වාදය නොවූයේ නම් (නිරයට) ඉදිරිපත් කරනු ලබන්නන් අතර නියතවශයෙන්ම මමද වන්නට තිබිණි'.

اَفَمَا نَحْنُ بِمَيِّتِيْنَ ﴿٥٩﴾

59. 'අප (නැවතත්) මරණයට පත්වන්නන් නොවේද?'

| | |
|---|---|
| 60. 'අපගේ පෙරවූ මරණය හැරය. තවද අප දඬුවම් කරනු ලබන්නන් නොවේද?' | إِلَّا مَوْتَتَنَا الْأُولَىٰ وَمَا نَحْنُ بِمُعَذَّبِينَ ٦٠ |
| 61. 'නියතවශයෙන්ම මෙයම අතිමහත් ජයග්‍රහණයකි'. | إِنَّ هَٰذَا لَهُوَ الْفَوْزُ الْعَظِيمُ ٦١ |
| 62. 'එසේනම් මෙවන් දේ සඳහා ක්‍රියා කරන්නන් ක්‍රියා කරත්වා'. | لِمِثْلِ هَٰذَا فَلْيَعْمَلِ الْعَامِلُونَ ٦٢ |
| 63. සංග්‍රහයක් ලෙස එය වඩා හොඳද, නැතිනම් zසක්කුම් ගසද? | أَذَٰلِكَ خَيْرٌ نُزُلًا أَمْ شَجَرَةُ الزَّقُّومِ ٦٣ |
| 64. සැබැවින්ම අපි එය වැරදි කරන්නන්ට පිරික්සුමක් කළෙමු. | إِنَّا جَعَلْنَاهَا فِتْنَةً لِلظَّالِمِينَ ٦٤ |
| 65. එය නිරයේ පතුලෙන් හටගන්නාවූ ගසකි. | إِنَّهَا شَجَرَةٌ تَخْرُجُ فِي أَصْلِ الْجَحِيمِ ٦٥ |
| 66. එහි දළු ෂෙයාතානුන්ගේ ඔළු ගෙඩි බඳුය. | طَلْعُهَا كَأَنَّهُ رُءُوسُ الشَّيَاطِينِ ٦٦ |
| 67. තවද නියතවශයෙන්ම ඔවුන් එයින් අනුභව කරන්නන්ය. තවද එයින් (ඔවුන්ගේ) කුස් පුරවාගන්නන්ය. | فَإِنَّهُمْ لَآكِلُونَ مِنْهَا فَمَالِئُونَ مِنْهَا الْبُطُونَ ٦٧ |
| 68. පසුව ඊට අමතරව (පානයක් ලෙස) ලෝදිය මිශ්‍රණය ඔවුනට ලැබෙනු ඇත. | ثُمَّ إِنَّ لَهُمْ عَلَيْهَا لَشَوْبًا مِنْ حَمِيمٍ ٦٨ |
| 69. පසුව නියතවශයෙන්ම ඔවුන්ගේ ආපසු පැමිණීම නිරය වෙත වනු ඇත. | ثُمَّ إِنَّ مَرْجِعَهُمْ لَإِلَى الْجَحِيمِ ٦٩ |
| 70. ඔවුහු ඇත්තෙන්ම තමන්ගේ පියවරුන්ව නොමග ගියවුන් ලෙස දුටුවෝය. | إِنَّهُمْ أَلْفَوْا آبَاءَهُمْ ضَالِّينَ ٧٠ |
| 71. තවද මොවුහු ඔවුන්ගේ අඩිපාරවල් ඔස්සේ යැමට යුහුසුළු වූහ. | فَهُمْ عَلَىٰ آثَارِهِمْ يُهْرَعُونَ ٧١ |

وَلَقَدْ ضَلَّ قَبْلَهُمْ أَكْثَرُ الْأَوَّلِينَ ﴿٧٢﴾

72. තවද පෙර යුගයේ සිටි ජනතාවන්ගෙන් බොහෝ අය මොවුන්ට කළින් නොමගෙහි වූහ.

وَلَقَدْ أَرْسَلْنَا فِيهِم مُّنذِرِينَ ﴿٧٣﴾

73. තවද ඔවුන් අතරට අපි අවවාද කරුවන් යවා ඇත්තෙමු.

فَانظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الْمُنذَرِينَ ﴿٧٤﴾

74. බලනු! පසුව අවවාද කරනු ලැබුවන්ගේ අවසානය කෙතරම් (නපුරු) වූයේද?

إِلَّا عِبَادَ اللَّهِ الْمُخْلَصِينَ ﴿٧٥﴾

75. තෝරාගන්නා ලද අල්ලාහ්ගේ දාසයින් හැරෙන්නටය.

وَلَقَدْ نَادَانَا نُوحٌ فَلَنِعْمَ الْمُجِيبُونَ ﴿٧٦﴾

76. තවද ඇත්තෙන්ම නූහ් අපව හඬගැසුවේය. තවද අපි (ඔහුගේ අයැදීමට) කෙතරම් විශිෂ්ඨ පිළිතුරු දුන්නෙමුද!

وَنَجَّيْنَاهُ وَأَهْلَهُ مِنَ الْكَرْبِ الْعَظِيمِ ﴿٧٧﴾

77. තවද අපි ඔහුවද ඔහුගේ පවුලේ අයවද මහත් විපතින් මුදවා ගත්තෙමු.

وَجَعَلْنَا ذُرِّيَّتَهُ هُمُ الْبَاقِينَ ﴿٧٨﴾

78. තවද ඔහුගේ පැවත එන්නන්ව පමණක් අපි ඉතිරි වූවන් කළෙමු.

وَتَرَكْنَا عَلَيْهِ فِي الْآخِرِينَ ﴿٧٩﴾

79. තවද අපි ඔහුට (ඔහුගේ නාමය) මතු පැමිණි පරම්පරාවන් අතර පවතින්නට හැරියෙමු.

سَلَامٌ عَلَىٰ نُوحٍ فِي الْعَالَمِينَ ﴿٨٠﴾

80. සියළු ලෝ (ජනතාව) අතර නූහ්ට සාමය අත් වේවා.

إِنَّا كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ﴿٨١﴾

81. මෙලෙස අපි ඇත්තෙන්ම යහපත් ක්‍රියා කරන්නන් හට තිළිණ දෙන්නෙමු.

إِنَّهُ مِنْ عِبَادِنَا الْمُؤْمِنِينَ ﴿٨٢﴾

82. නියතවශයෙන්ම ඔහු අපගේ විශ්වාසිත දාසයින්ගෙන් (කෙනෙක්) විය.

ثُمَّ أَغْرَقْنَا الْآخَرِينَ ﴿٨٣﴾

83. පසුව අපි අන් අයව ගිල්වූයෙමු.

وَإِنَّ مِن شِيعَتِهِ لَإِبْرَاهِيمَ ﴿٨٤﴾

84. තවද සැබැවින්ම ඉබ්රාහීම්ද ඔහුගේ සමූහය අතරින් විය.

إِذْ جَاءَ رَبَّهُ بِقَلْبٍ سَلِيمٍ ﴿٨٥﴾

85. ඔහු අවනත හදවතින් යුතුව තම අධිපතියාණන් වෙතට පැමිණි කල්හි.

إِذْ قَالَ لِأَبِيهِ وَقَوْمِهِ مَاذَا تَعْبُدُونَ ﴿٨٦﴾

86. තම පියා සහ තම ජනතාවගෙන් ඔහු (මෙසේ) ඇසූ කල්හි, 'නුඹලා වඳින දේ කුමක්ද?'

أَئِفْكًا آلِهَةً دُونَ اللَّهِ تُرِيدُونَ ﴿٨٧﴾

87. 'නුඹලා අල්ලාහ් වෙනුවට ව්‍යාජ දෙවිවරුන්ව පතන්නෙහුද?'

فَمَا ظَنُّكُم بِرَبِّ الْعَالَمِينَ ﴿٨٨﴾

88. 'එසේ නම් සර්ව ලෝකයන්ට අධිපතියාණන් පිළිබඳව නුඹලාගේ මතය කුමක්ද?'

فَنَظَرَ نَظْرَةً فِي النُّجُومِ ﴿٨٩﴾

89. පසුව ඔහු තාරකා දෙස බැල්මක් හෙළුවේය.

فَقَالَ إِنِّي سَقِيمٌ ﴿٩٠﴾

90. තවද 'ඇත්තෙන්ම මම අසනීපයෙන් පසුවන්නෙමි'යි කීවේය.

فَتَوَلَّوْا عَنْهُ مُدْبِرِينَ ﴿٩١﴾

91. එබැවින් ඔවුහු පිටුපා ඔහුගෙන් හැරී ගියහ.

فَرَاغَ إِلَىٰ آلِهَتِهِمْ فَقَالَ أَلَا تَأْكُلُونَ ﴿٩٢﴾

92. පසුව ඔහු ඔවුන්ගේ දෙවිවරුන් වෙත රහසිගතව ගොස්, 'නුඹලා අනුභව නොකරන්නෙහුද.?'යි ඇසුවේය.

مَا لَكُمْ لَا تَنطِقُونَ ﴿٩٣﴾

93. 'නුඹලා කථා නොකර සිටීමට නුඹලාට කුමක් සිදුවූයේද?'

فَرَاغَ عَلَيْهِمْ ضَرْبًا بِالْيَمِينِ ﴿٩٤﴾

94. පසුව එසැනින්ම ඔහු දකුණතින් ඒවාට පහර දෙන්නට පටන් ගත්තේය.

فَأَقْبَلُوا إِلَيْهِ يَزِفُّونَ ﴿٩٥﴾

95. ඉන් පසුව (ජනයා) කඩිනමින් ඔහු වෙතට පැමිණියහ.

قَالَ أَتَعْبُدُونَ مَا تَنْحِتُونَ ﴿٩٦﴾

96. ඔහු (මෙසේ) පැවසීය, 'නුඹලා විසින් කැටයම් කර ඇති දේට නුඹලා වඳින්නෙහුද?'

وَاللَّهُ خَلَقَكُمْ وَمَا تَعْمَلُونَ ﴿٩٧﴾

97. 'කෙසේවුවද, අල්ලාහ් නුඹලාවද නුඹලා කරන දේද මවා ඇත්තේය.'

قَالُوا ابْنُوا لَهُ بُنْيَانًا فَأَلْقُوهُ فِي

98. ඔවුහු, 'ඔහු වෙනුවෙන් චිතකයක්

| | |
|---|---|
| الْجَحِيمِ ﴿٩٨﴾ | තනනු. තවද ඔහුව ගින්න තුළට ඇද දමනු'යි කීහ. |
| فَأَرَادُوا بِهِ كَيْدًا فَجَعَلْنَاهُمُ الْأَسْفَلِينَ ﴿٩٩﴾ | 99. මෙලෙස ඔවුහු ඔහුට එරෙහිව නපුරු සැලැස්මක් කරන්නට අදිටන් කළහ. නමුත් අපි ඔවුන්ව මහත් නින්දාවට පත් වූවන් කළෙමු. |
| وَقَالَ إِنِّي ذَاهِبٌ إِلَىٰ رَبِّي سَيَهْدِينِ ﴿١٠٠﴾ | 100. තවද ඔහු, 'මම මාගේ අධිපතියාණන් වෙතට යන්නෙමි. නියතවශයෙන්ම ඔහු මා හට මගපෙන්වන්නේයැ'යි පැවසුවේය |
| رَبِّ هَبْ لِي مِنَ الصَّالِحِينَ ﴿١٠١﴾ | 101. 'මාගේ අධිපතියාණෙනි! මාහට ධාර්මිෂ්ඨ (පුතෙකු) ලබා දෙනු මැනව'. |
| فَبَشَّرْنَاهُ بِغُلَامٍ حَلِيمٍ ﴿١٠٢﴾ | 102. එබැවින් අපි ඔහුට ඉවසිලිවන්ත පුතෙකු ගැන ශුභාරංචිය දුන්නෙමු. |
| فَلَمَّا بَلَغَ مَعَهُ السَّعْيَ قَالَ يَا بُنَيَّ إِنِّي أَرَىٰ فِي الْمَنَامِ أَنِّي أَذْبَحُكَ فَانظُرْ مَاذَا تَرَىٰ ۚ قَالَ يَا أَبَتِ افْعَلْ مَا تُؤْمَرُ ۖ سَتَجِدُنِي إِن شَاءَ اللَّهُ مِنَ الصَّابِرِينَ ﴿١٠٣﴾ | 103. එහෙයින් හෙතෙම ඔහු සමග (දිව ඇවිද) වැඩ කිරීමට ප්‍රමාණවත් වයසට එළැඹූ කල්හි, ඔහු 'එම්බල මාගේ දයාබර පුතුණුවනි! මා ඔබව ඝාතනය කරන බව මම සිහිනෙන් දුටිමි. එබැවින් (ඒ ගැන) ඔබ කුමක් අදහස් කරන්නේදැ?'යි කීවේය. එයට හෙතෙම 'එම්බල මාගේ පියාණෙනි! ඔබට අණ කරනු ලැබූ දේ පරිදි ඔබ කරන්න. අල්ලාහ් අභිමත වූයේ නම් මා ඉවසිලිවන්තයින්ගෙන් කෙනෙකු බව ඇත්තෙන්ම ඔබ දකිනු ඇතැ'යි පිළිතුරු දුන්නේය. |
| فَلَمَّا أَسْلَمَا وَتَلَّهُ لِلْجَبِينِ ﴿١٠٤﴾ | 104. තවද ඔවුන් දෙදෙනාම (දෙවියන්ගේ අභිමතයට) අවනත වූ කල්හි, ඔහු හෙතෙමව මුණින් අතට හරවා වැතිරුවේය. |
| وَنَادَيْنَاهُ أَن يَا إِبْرَاهِيمُ ﴿١٠٥﴾ | 105. එවිට අපි ඔහුට 'එම්බල ඉබ්රාහීම්'! යනුවෙන් හඬගැසුවෙමු. |
| قَدْ صَدَّقْتَ الرُّؤْيَا ۚ إِنَّا كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ﴿١٠٦﴾ | 106. ඇත්තෙන්ම ඔබ සිහිනය ඉටුකර ඇත්තෙහිය. මෙයාකාරයට ඇත්තෙන්ම අපි යහපත් ක්‍රියා කරන්නන්හට තිළිණ දෙන්නෙමු. |

107. එය නියතවශයෙන්ම ප්‍රත්‍යක්ෂ පිරික්සුමක් විය.

إِنَّ هَٰذَا لَهُوَ الْبَلَٰٓؤُا الْمُبِينُ ﴿١٠٧﴾

108. අපි ඔහුව මහත් පරිත්‍යාගයක් මගින් ගලවා ගත්තෙමු.

وَفَدَيْنَٰهُ بِذِبْحٍ عَظِيمٍ ﴿١٠٨﴾

109. තවද අපි ඔහුට (ඔහුගේ නාමය) මතු පැමිණෙන පරම්පරාවන් අතර පවතින්නට හැරියෙමු.

وَتَرَكْنَا عَلَيْهِ فِي الْآخِرِينَ ﴿١٠٩﴾

110. 'ඉබ්රාහීම්ට සාමය අත්වේවා!'

سَلَٰمٌ عَلَىٰٓ إِبْرَٰهِيمَ ﴿١١٠﴾

111. මෙයාකාරයට අපි යහපත් ක්‍රියා කරන්නන්හට තිළිණ දෙන්නෙමු.

كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ﴿١١١﴾

112. නියතවශයෙන්ම ඔහු අපගේ විශ්වාසිත දාසයින්ගෙන් (කෙනෙක්) විය.

إِنَّهُۥ مِنْ عِبَادِنَا الْمُؤْمِنِينَ ﴿١١٢﴾

113. තවද අපි ඔහුට ඉස්හාක් පිළිබඳව ශුභාරංචි දුන්නෙමු. (ඔහු) වක්තෘවරයෙක්ය. (තවද) ධාර්මිෂ්ඨකයින්ගෙන් (කෙනෙක්)ය.

وَبَشَّرْنَٰهُ بِإِسْحَٰقَ نَبِيًّا مِّنَ الصَّٰلِحِينَ ﴿١١٣﴾

*114. තවද අපි ඔහුටද ඉස්හාක්ටද ආශිර්වාදයක් පිරිනැමුවෙමු. තවද ඔවුන් දෙදෙනාගේ පරපුර අතරින් යහපත කරන අය බොහෝ දෙනෙක්ද තමන්ටම ප්‍රත්‍යක්ෂව කුරිරු වන බොහෝ දෙනෙක්ද වෙති.

وَبَٰرَكْنَا عَلَيْهِ وَعَلَىٰٓ إِسْحَٰقَ ۚ وَمِن ذُرِّيَّتِهِمَا مُحْسِنٌ وَظَالِمٌ لِّنَفْسِهِۦ مُبِينٌ ﴿١١٤﴾

115. තවද ඇත්තෙන්ම අපි මූසාටද, හාරූන්ටද අනුග්‍රහයන් පිරිනැමුවෙමු.

وَلَقَدْ مَنَنَّا عَلَىٰ مُوسَىٰ وَهَٰرُونَ ﴿١١٥﴾

116. තවද අපි ඔවුන් දෙදෙනාවද ඔවුන්ගේ ජනතාවද මහත් විපතින්

وَنَجَّيْنَٰهُمَا وَقَوْمَهُمَا مِنَ الْكَرْبِ

*සටහන: 114. 'zසාලිම්' (කුරිරු) හෝ 'zසුල්ම්' (කෲරකම) යන වචනය කුර්ආනයෙහි සෑම විටම 'නපුරක්' ලෙස භාවිතා නොවේ. මෙම අර්ථයේ භාවිතා වූ විට මෙය සෑම ආකාරයේ නිවැරදි මගින් ඉවත් වීම පෙන්නුම් කරයි. නමුත් සමහරවිට මෙය වෙනස් වන අවස්ථාවද ඇත. එවිට එය ප්‍රසංශා කිරීමක් යන අර්ථය දෙන්නේය. කුර්ආනයේ 35-33 (අල් ෆාතිර්) හි අල්ලාහ් ඔහුගේ තෝරාපත් කළ දාසයින්ව 'zසාලිමුන් ලි නෆ්සිහි' තුලට ඇතුලත් කර බව පෙන්නුම් කරයි. එනම් ඔවුන් අල්ලාහ්ගේ මාර්ගයෙහි පරිශ්‍රමයේ යෙදෙන විටදී ඔවුන් තමන්ටම කෲරකම් කරගත් බවය. මෙම කාණ්ඩයේ තවත් ස්ථානයක මීටත් වඩා සාපේක්ෂව උසස් තත්වයක් සඳහන් වෙයි. එනම් අල් ෆාතිර් 35-33 හි 'මුක්තසිද්' සහ 'සාබික් බිල් හයිරාත්' මෙලෙස කෙනෙකුගේ අධ්‍යාත්මික අරගලයේ මුල් අවදියේදී ඔහු යහපත් ක්‍රියා කිරීමට තමන්ටම තදින් සිටීමටද කුරිරු වීමටද සිදුවේ. මෙවන් දේ කෙනෙකු දෙවියන් වෙනුවෙන් පමණක් කරන විට පැහැදිලිවම ප්‍රසංශනීය වේ. එවිට ඔවුන් 'zසාලිමුන් ලිනෆ්සිහි' එනම් තමන්ටම කුරිරු විය යනුවෙන් සඳහන් වේ.

මුදවා ගත්තෙමු.

الْعَظِيْمِ ۝١١٦

117. තවද අපි ඔවුන්ට උදව් කළෙමු. එහෙයින් ඔවුන්ම ජයග්‍රාහිකයින් වූහ.

وَنَصَرْنٰهُمْ فَكَانُوْا هُمُ الْغٰلِبِيْنَ ۝١١٧

118. තවද අපි ඔවුන්ට ප්‍රත්‍යක්ෂව විග්‍රහ කරන්නාවූ පුස්තකය දුනිමු.

وَاٰتَيْنٰهُمَا الْكِتٰبَ الْمُسْتَبِيْنَ ۝١١٨

119. තවද අපි ඔවුන්ව සෘජු මාර්ගයට යොමු කළෙමු.

وَهَدَيْنٰهُمَا الصِّرَاطَ الْمُسْتَقِيْمَ ۝١١٩

120. තවද අපි ඔවුන් දෙදෙනාගේ (නාමයන්) මතු පැමිණි පරම්පරාවන් අතර පවතින්නට හැරියෙමු.

وَتَرَكْنَا عَلَيْهِمَا فِي الْاٰخِرِيْنَ ۝١٢٠

121. 'මූසා සහ හාරූන්ට සාමය අත් වේවා'!

سَلٰمٌ عَلٰى مُوْسٰى وَهٰرُوْنَ ۝١٢١

122. මෙයාකාරයට ඇත්තෙන්ම අපි යහපත් ක්‍රියා කරන්නන්හට තිළිණ දෙන්නෙමු.

اِنَّا كَذٰلِكَ نَجْزِي الْمُحْسِنِيْنَ ۝١٢٢

123. නියතවශයෙන්ම ඔවුන් දෙදෙනා අපගේ විශ්වාසිත දාසයින් අතර වූහ.

اِنَّهُمَا مِنْ عِبَادِنَا الْمُؤْمِنِيْنَ ۝١٢٣

124. තවද සැබවින්ම ඉල්යාස්(අ) දූතයින්ගෙන් (කෙනෙක්) විය.

وَاِنَّ اِلْيَاسَ لَمِنَ الْمُرْسَلِيْنَ ۝١٢٤

125. ඔහු තම ජනතාව වෙත, 'නුඹලා දෙවියන්ට බියබැති මත් නොවන්නෙහුද?'යි කියූ කල්හි.

اِذْ قَالَ لِقَوْمِهٖٓ اَلَا تَتَّقُوْنَ ۝١٢٥

126. 'නුඹලා ශ්‍රේෂ්ඨතම මැවුම්කරුවාණන්ව අත්හැර බඅල් (පිළිමය) කැඳවන්නෙහුද?'

اَتَدْعُوْنَ بَعْلًا وَّتَذَرُوْنَ اَحْسَنَ الْخٰلِقِيْنَ ۝١٢٦

127. 'නුඹලාගේ අධිපතියාණන් මෙන්ම නුඹලාගේ පැරණි මුතුන්මිත්තන්ගේද අධිපතියාණන් වන අල්ලාහ්ව (අත්හරින්නෙහුද)?'

اللّٰهَ رَبَّكُمْ وَرَبَّ اٰبَآئِكُمُ الْاَوَّلِيْنَ ۝١٢٧

128. නමුත් ඔවුහු ඔහුව මුසාවාදියෙකු ලෙස සැළකූහ. තවද ඔවුහු (ගණන් පියවීම සඳහා දෙවියන් ඉදිරියට) ගෙන එනු ලබන්නෝය.

فَكَذَّبُوْهُ فَاِنَّهُمْ لَمُحْضَرُوْنَ ۝١٢٨

129. තෝරා ගන්නා ලද අල්ලාහ්ගේ දාසයින් හැරෙන්නටය.

إِلَّا عِبَادَ اللَّهِ الْمُخْلَصِينَ ١٢٩

130. තවද අපි ඔහුට (ඔහුගේ නාමය) මතු පැමිණි පරම්පරාවන් අතර පවතින්නට හැරියෙමු.

وَتَرَكْنَا عَلَيْهِ فِي الْآخِرِينَ ١٣٠

131. 'ඉල්යාස්වරුන්ටත් සාමය අත්වේවා!'

سَلَامٌ عَلَىٰ إِلْ يَاسِينَ ١٣١

132. මෙයාකාරයට ඇත්තෙන්ම අපි යහපත් ක්‍රියා කරන්නන්හට තිළිණ දෙන්නෙමු.

إِنَّا كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ١٣٢

133. නියතවශයෙන්ම ඔහු අපගේ විශ්වාසිත දාසයින්ගෙන් (කෙනෙක්) විය.

إِنَّهُ مِنْ عِبَادِنَا الْمُؤْمِنِينَ ١٣٣

134. තවද නියතවශයෙන්ම ලූත්(අ) දූතයින්ගෙන් (කෙනෙක්) විය.

وَإِنَّ لُوطًا لَمِنَ الْمُرْسَلِينَ ١٣٤

135. අප ඔහුවද ඔහුගේ පවුලේ අය සියල්ලන්වද බේරාගත් කල්හි,

إِذْ نَجَّيْنَاهُ وَأَهْلَهُ أَجْمَعِينَ ١٣٥

136. පසුබටව සිටි අය අතර (වූ) මහළු ස්ත්‍රියක් හැරන්නටය.

إِلَّا عَجُوزًا فِي الْغَابِرِينَ ١٣٦

137. පසුව අන් අයව සහමුලින්ම අපි විනාශ කළෙමු.

ثُمَّ دَمَّرْنَا الْآخَرِينَ ١٣٧

138. තවද නියතවශයෙන්ම නුඹලා ඔවුන් (විනාශ වූ තැන්) උදෑසනයෙහි පසුකර යන්නෙහුය,

وَإِنَّكُمْ لَتَمُرُّونَ عَلَيْهِمْ مُصْبِحِينَ ١٣٨

139. තවද රාත්‍රියෙහිද, එසේනම් නුඹලා තේරුම් නොගන්නේ මන්ද?

وَبِاللَّيْلِ ۗ أَفَلَا تَعْقِلُونَ ١٣٩

140. තවද නියතවශයෙන්ම යූනුස්(අ) දූතයින්ගෙන් (කෙනෙක්) විය.

وَإِنَّ يُونُسَ لَمِنَ الْمُرْسَلِينَ ١٤٠

141. ඔහු බර පටවන ලද නැවට පලාගිය කල්හි,

إِذْ أَبَقَ إِلَى الْفُلْكِ الْمَشْحُونِ ١٤١

142. තවද (මුහුදු රැළ කැළඹීමෙන් නැව ආපදාවට ලක් වූ විට) ඔහු (නැවෙහි තමන් සමග සිටි අයගේ අණ පිට) කුසපත් ඇද්දේය. (එහි ඔහුගේ නාමය පැමිණි නිසා) ඔහු (මුහුදට) හෙළනු ලැබූවන්ගෙන් විය.

فَسَاهَمَ فَكَانَ مِنَ الْمُدْحَضِينَ ١٤٢

فَالْتَقَمَهُ الْحُوْتُ وَهُوَ مُلِيْمٌ ۝١٤٣

143. තවද ඔහු (තමන්ටම) දොස් පවරමින් සිටියදී මත්ස්‍යයා ඔහුව ගිල ගත්තේය.

فَلَوْلَآ اَنَّهٗ كَانَ مِنَ الْمُسَبِّحِيْنَ ۝١٤٤

144. තවද ඔහු දෙවියන්ව සුවිශුද්ධ කරන්නන්ගෙන් නොවී සිටියා නම්,

لَلَبِثَ فِيْ بَطْنِهٖٓ اِلٰى يَوْمِ يُبْعَثُوْنَ ۝١٤٥

145. නියතවශයෙන්ම ඔහු පුනරුත්ථාන දිනය දක්වාම උගේ කුස තුල රැඳී සිටින්නට තිබුණි.

فَنَبَذْنٰهُ بِالْعَرَآءِ وَهُوَ سَقِيْمٌ ۝١٤٦

146. පසුව අපි ඔහුව හිස් වූ වෙරළ තිරුවක හෙළුවෙමු. තවද ඔහු අසනීප විය.

وَاَنْۢبَتْنَا عَلَيْهِ شَجَرَةً مِّنْ يَّقْطِيْنٍ ۝١٤٧

147. තවද අපි ඔහු වටා ලබු වැලක් වැවීමට සැලැස්වීමු.

وَاَرْسَلْنٰهُ اِلٰى مِائَةِ اَلْفٍ اَوْ يَزِيْدُوْنَ ۝١٤٨

148. තවද අපි ඔහුව සිය දහසක් හෝ ඊටත් අධික ජනතාව වෙත (දූතයෙකු ලෙස) එව්වෙමු.

فَاٰمَنُوْا فَمَتَّعْنٰهُمْ اِلٰى حِيْنٍ ۝١٤٩

149. තවද ඔවුහු විශ්වාස කළහ. එබැවින් අපි ඔවුන්ට කලකට ජීවනෝපාය දුන්නෙමු.

فَاسْتَفْتِهِمْ اَلِرَبِّكَ الْبَنَاتُ وَلَهُمُ الْبَنُوْنَ ۝١٥٠

150. දැන් ඔවුන්ගෙන්, ඔවුන්ට පුතුන් සිටියදී ඔබගේ අධිපතියාණන්ට දූවරුන්දැ?යි අසන්න.

اَمْ خَلَقْنَا الْمَلٰٓئِكَةَ اِنَاثًا وَّهُمْ شٰهِدُوْنَ ۝١٥١

151. ඔවුන් සාක්ෂිකරුවන්ව සිටියදී අපි සුරදූතයින්ව ස්ත්‍රීන් ලෙස මැව්වෙමුද?

اَلَآ اِنَّهُمْ مِّنْ اِفْكِهِمْ لَيَقُوْلُوْنَ ۝١٥٢

152. අවධාරණයයි! සැබැවින්ම ඔවුන් තමන් ගෙතූ බොරුවෙන් (මෙසේ) පවසන්නෝය.

وَلَدَ اللّٰهُ ۙ وَاِنَّهُمْ لَكٰذِبُوْنَ ۝١٥٣

153. (එය) 'අල්ලාහ් (දරුවන්) ජනිත කර ඇතැ'(යි කීමය). තවද ඔවුන් නිශ්චිතවම මුසාවාදීන්ය.

اَصْطَفَى الْبَنَاتِ عَلَى الْبَنِيْنَ ۝١٥٤

154. ඔහු පුතුන්ට වඩා දූවරුන්ට ප්‍රමුඛත්වය දුන්නේද?

مَا لَكُمْ ۟ كَيْفَ تَحْكُمُوْنَ ۝١٥٥

155. නුඹලාට කුමක් සිදුවීද? නුඹලා කෙසේ තීන්දු දෙන්නෙහුද?

156. එසේනම් නුඹලා මෙනෙහි නොකරන්නෙහුද?

اَفَلَا تَذَكَّرُوْنَ ﴿١٥٦﴾

157. නැතහොත් නුඹලාට පැහැදිලි සාධකයක් තිබේද?

اَمْ لَكُمْ سُلْطٰنٌ مُّبِيْنٌ ﴿١٥٧﴾

158. එසේ නුඹලා සත්‍යවාදීන් වේ නම්, නුඹලාගේ පුස්තකය ඉදිරිපත් කරනු.

فَأْتُوْا بِكِتٰبِكُمْ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿١٥٨﴾

159. තවද ඔවුහු ඔහු සහ ජින්වරුන් අතර ලේ නෑකමක් ඇති කරන්නෝය. එනමුත් ජින්වරුන් තමන් (ඔහු අභියස) කැඳවනු ලබන්නන් බව මැනැවින් දන්නෝය.

وَجَعَلُوْا بَيْنَهٗ وَبَيْنَ الْجِنَّةِ نَسَبًا ؕ وَلَقَدْ عَلِمَتِ الْجِنَّةُ اِنَّهُمْ لَمُحْضَرُوْنَ ﴿١٥٩﴾

160. තවද ඔවුන් වර්ණනා කරන දෙයින් අල්ලාහ් (නිදහස් මෙන්ම) පාරිශුද්ධය.

سُبْحٰنَ اللّٰهِ عَمَّا يَصِفُوْنَ ﴿١٦٠﴾

161. තෝරා ගන්නා ලද අල්ලාහ්ගේ දාසයින් හැරය. (ඔවුන් එසේ නොවේ)

اِلَّا عِبَادَ اللّٰهِ الْمُخْلَصِيْنَ ﴿١٦١﴾

162. සැබැවින්ම නුඹලාද නුඹලා වඳින දේද.

فَاِنَّكُمْ وَمَا تَعْبُدُوْنَ ﴿١٦٢﴾

163. නුඹලාගෙන් කිසිවෙකුටත් ඔහුට එරෙහිව (කිසිවෙකුව) නොමග යැවීමට නොහැකිය.

مَاۤ اَنْتُمْ عَلَيْهِ بِفٰتِنِيْنَ ﴿١٦٣﴾

164. නිරයෙහි දැවෙන්නෙකු හැරය.

اِلَّا مَنْ هُوَ صَالِ الْجَحِيْمِ ﴿١٦٤﴾

165. තවද 'අපගෙන් සෑම අයෙකුටම නියමිත ස්ථානයක් නියම කොට ඇතැ'යි (සුරදූතයින් පවසන්නෝය)

وَمَا مِنَّاۤ اِلَّا لَهٗ مَقَامٌ مَّعْلُوْمٌ ﴿١٦٥﴾

166. 'තවද සැබැවින්ම ශ්‍රේණිගතව පෙළගැසී සිටින්නන් අපිම වෙමු'.

وَّاِنَّا لَنَحْنُ الصَّآفُّوْنَ ﴿١٦٦﴾

167. 'තවද සැබැවින්ම (දෙවියන්ව) සුවිශුද්ධ කරන්නන් අපිම වෙමු'.

وَاِنَّا لَنَحْنُ الْمُسَبِّحُوْنَ ﴿١٦٧﴾

168. තවද නියතවශයෙන්ම (අවිශ්වාසීතයින්) පවසමින් සිටින්නේ,

وَاِنْ كَانُوْا لَيَقُوْلُوْنَ ﴿١٦٨﴾

169. 'පැරණි ජනතාවගෙන් මෙන් අපටද ග්‍රන්ථයක් තිබුණේ නම්'.

لَوْ أَنَّ عِندَنَا ذِكْرًا مِّنَ الْأَوَّلِينَ ١٦٩

170. 'නියතවශයෙන්ම අපිද තෝරාපත්කළ අල්ලාහ්ගේ දාසයින් වන්නට තිබුණි'.

لَكُنَّا عِبَادَ اللَّهِ الْمُخْلَصِينَ ١٧٠

171. නමුත් (එය ඔවුන් වෙත පැමිණි විට) ඔවුහු එය කෙරෙහි අවිශ්වාස කළහ. නමුත් ඔවුහු (තම අවසානය) ඉක්මනින් දැනගන්නෝය.

فَكَفَرُوا بِهِ فَسَوْفَ يَعْلَمُونَ ١٧١

172. තවද දූතයින් වන අපගේ දාසයින් පිළිබඳව අපගේ වචනය නියතවශයෙන්ම ඉටුවී හමාරය.

وَلَقَدْ سَبَقَتْ كَلِمَتُنَا لِعِبَادِنَا الْمُرْسَلِينَ ١٧٢

173. එනම් නියතවශයෙන්ම උදව් කරනු ලබන්නන් ඔවුන්මය.

إِنَّهُمْ لَهُمُ الْمَنصُورُونَ ١٧٣

174. තවද නියතවශයෙන්ම ජයග්‍රාහිකයින් වන්නේ අපගේ සේනාවමය.

وَإِنَّ جُندَنَا لَهُمُ الْغَالِبُونَ ١٧٤

175. එබැවින් ඔබ ටික කලකට ඔවුන්ගෙන් ඉවත්ව යන්න.

فَتَوَلَّ عَنْهُمْ حَتَّىٰ حِينٍ ١٧٥

176. තවද ඔවුන් ගැන පරීක්ෂාකාරී වන්න. ඔවුන්ද ඉක්මණින් දකිනු ඇත.

وَأَبْصِرْهُمْ فَسَوْفَ يُبْصِرُونَ ١٧٦

177. එසේනම් ඔවුන් අපගේ දඬුවම ඉක්මන් වීමට පතන්නේද?

أَفَبِعَذَابِنَا يَسْتَعْجِلُونَ ١٧٧

178. නමුත් එය ඔවුන්ගේ මිදුලට පහළ වන විට අවවාද කරන ලද අයට එය නපුරුම උදෑසනක් වනු ඇත.

فَإِذَا نَزَلَ بِسَاحَتِهِمْ فَسَاءَ صَبَاحُ الْمُنذَرِينَ ١٧٨

179. එබැවින් ඔබ ටික කලකට ඔවුන්ගෙන් ඉවත්ව යන්න.

وَتَوَلَّ عَنْهُمْ حَتَّىٰ حِينٍ ١٧٩

180. තවද පරීක්ෂාකාරී වන්න. ඔවුන්ද ඉක්මණින් දකිනු ඇත.

وَأَبْصِرْ فَسَوْفَ يُبْصِرُونَ ١٨٠

181. ඔවුන් වර්ණනා කරන දේට වඩා ගෞරවය (හා බලය) හිමි අධිපතියාණන් වන ඔබගේ අධිපතියාණන් පාරිශුද්ධය.

سُبْحَانَ رَبِّكَ رَبِّ الْعِزَّةِ عَمَّا يَصِفُونَ ١٨١

182. තවද දූතයින්ට සාමය අත්වේවා!

وَسَلَٰمٌ عَلَى ٱلْمُرْسَلِينَ ۝١٨٢

183. සියළු ප්‍රසංශා සර්ව ලෝකයන්ට අධිපතියාණන් වන අල්ලාහ්ට අයත්ය.

وَٱلْحَمْدُ لِلَّهِ رَبِّ ٱلْعَٰلَمِينَ ۝١٨٣




## සාද්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

صٓ وَالۡقُرۡاٰنِ ذِى الذِّكۡرِؕ ②

2. සාද්◆ අනුශාසනාවෙන් පිරුණු කුර්ආන් මත දිවුරමින් (මෙය අප අනාවරණය කරන ලද වදන් වේ).

بَلِ الَّذِيۡنَ كَفَرُوۡا فِىۡ عِزَّةٍ وَّشِقَاقٍ ③

3. නමුත් අවිශ්වාස කරන අය, (පුහු) උඩඟුකමෙහිද සතුරුකමෙහිද (ගිලිහි) සිටිති.

كَمۡ اَهۡلَـكۡنَا مِنۡ قَبۡلِهِمۡ مِّنۡ قَرۡنٍ فَنَادَوۡا وَّلَاتَ حِيۡنَ مَنَاصٍ ④

4. කොමපණ පරම්පරාවන් ඔවුන්ට පෙර අපි විනාශ කර ඇත්තෙමුද! ඔවුන් (උදව් ඉල්ලා) හඬ ගැසූහ, නමුත් එය ගැලවී යාමේ වේලාවක් නොවීය.

وَعَجِبُوۡۤا اَنۡ جَآءَهُمۡ مُّنۡذِرٌ مِّنۡهُمۡ وَقَالَ الۡكٰفِرُوۡنَ هٰذَا سٰحِرٌ كَذَّابٌ ۖۚ ⑤

5. තවද ඔවුන් අතුරින් ඔවුන් වෙතට අවවාදකරුවෙකු පැමිණ ඇති බව (දැන) ඔවුහු මවිතයට පත් වෙති. තවද අවිශ්වාසිතයින් (මෙසේ) පවසන්නෝය. 'මොහු මායාකරුවෙකු මෙන්ම බොරුකාරයෙකුය'.

اَجَعَلَ الۡاٰلِهَةَ اِلٰهًا وَّاحِدًا ۖۚ اِنَّ هٰذَا لَشَىۡءٌ عُجَابٌ ⑥

6. 'මොහු දෙවිවරුන්ව එකම දෙවියෙකු බවට කරගත්තේද? මෙය සැබැවින්ම (අප ඇසූ) අමුතුම දෙයකි'.

وَانۡطَلَقَ الۡمَلَاُ مِنۡهُمۡ اَنِ امۡشُوۡا وَاصۡبِرُوۡا عَلٰٓى اٰلِهَتِكُمۡ ۖۚ اِنَّ هٰذَا لَشَىۡءٌ يُّرَادُ ۖۚ ⑦

7. එමෙන්ම ඔවුන්ගේ ප්‍රධානීහු (මෙසේ) වාද කරමින් ගියහ. 'නුඹලා යනු. නුඹලාගේ දෙවිවරුන්ව දැඩිව අල්ලා ගනු. මෙය හිතාමතා කරන ලද්දක්ය'.

مَا سَمِعۡنَا بِهٰذَا فِى الۡمِلَّةِ الۡاٰخِرَةِ ۖۚ اِنۡ هٰذَاۤ اِلَّا اخۡتِلَاقٌ ۖۚ ⑧

8. 'අපි අන් කිසිදු ආගමක මෙවන් දෙයක් කිසිවිටෙකත් අසා නැත්තෙමු. මෙය ගෙතූ දෙයක් මිස අන් කිසිවක් නැත'.

◆සත්‍යවන්ත දෙවියනි!

9. 'කිමද! අප සියල්ල අතරින් අනුශාසනාව පහළ කරනු ලැබුවේ මොහුටද?' නොඑසේය, ඔවුන් මාගේ අනුශාසනාව පිළිබඳව සැකයෙහිය. එනමුත් ඔවුන් මාගේ දඬුවම තවමත් වින්දේ නැත.

ءَأُنْزِلَ عَلَيْهِ الذِّكْرُ مِنْ بَيْنِنَا ۚ بَلْ هُمْ فِي شَكٍّ مِنْ ذِكْرِي ۖ بَلْ لَمَّا يَذُوقُوا عَذَابِ ﴿٩﴾

10. බලසම්පන්නවූද අධික ලෙස පිරිනමන්නාවූද ඔබ අධිපතියාණන්ගේ දයාලුභාවයේ වස්තූන් ඔවුන්ට හිමිව තිබේද?

أَمْ عِنْدَهُمْ خَزَائِنُ رَحْمَةِ رَبِّكَ الْعَزِيزِ الْوَهَّابِ ﴿١٠﴾

11. නැතහොත් අහස් සහ පොළොව මෙන්ම ඒවා අතර ඇති සියල්ලන්ගේ රාජ්‍යය ඔවුන්ගේද? එසේනම් (ඔවුන් සතු දේවල් සමග) ඔවුන්ගේ සැලැසුම් මුදුන්පත් වන්නට ඉඩ හරින්වා.

أَمْ لَهُمْ مُلْكُ السَّمَاوَاتِ وَالْأَرْضِ وَمَا بَيْنَهُمَا ۖ فَلْيَرْتَقُوا فِي الْأَسْبَابِ ﴿١١﴾

12. ඒකරාශිවූ අයගෙන් සේනාවක් මෙහිදී පරාජය කරනු ලබන්නේය.

جُنْدٌ مَا هُنَالِكَ مَهْزُومٌ مِنَ الْأَحْزَابِ ﴿١٢﴾

13. මෙලෙසම, ඔවුන්ට පෙර නූහ්ගේ ජනතාවද, ආද් (ගෝත්‍රිකයින්)ද, හමුදාපති වූ ෆිර්අවුන්ද ප්‍රතික්ෂේප කළහ.

كَذَّبَتْ قَبْلَهُمْ قَوْمُ نُوحٍ وَعَادٌ وَفِرْعَوْنُ ذُو الْأَوْتَادِ ﴿١٣﴾

14. එමෙන්ම සමූද් (ගෝත්‍රිකයන්)ද ලූත්ගේ ජනතාවද අයිකා (ඝන වෘක්ෂ ආශ්‍රිත) වාසීන්ද (ප්‍රතික්ෂේප කළහ). ඒකරාශී වූවන් මොවුන්ය.

وَثَمُودُ وَقَوْمُ لُوطٍ وَأَصْحَابُ الْأَيْكَةِ ۚ أُولَٰئِكَ الْأَحْزَابُ ﴿١٤﴾

15. එකෙක් නැර සියල්ලෝම දූතයින්ව ප්‍රතික්ෂේප කළහ. එමනිසා මාගේ දඬුවම ස්ථිර විය.

إِنْ كُلٌّ إِلَّا كَذَّبَ الرُّسُلَ فَحَقَّ عِقَابِ ﴿١٥﴾

16. ඔවුන් බලාපොරොත්තුවෙන් සිටින්නේ පුපුරණ හඬක් මිස නැත. එයින් කාල විරාමයක් නොවනු ඇත.

وَمَا يَنْظُرُ هَٰؤُلَاءِ إِلَّا صَيْحَةً وَاحِدَةً مَا لَهَا مِنْ فَوَاقٍ ﴿١٦﴾

17. ඔවුහු, 'අපගේ අධිපතියාණෙනි! ගණන් ගැනීමේ දිනයට පෙර (දඬුවමෙහි) අපගේ කොටස අපට කඩිනම් කරනු මැනවැ'යි පවසන්නෝය.

وَقَالُوا رَبَّنَا عَجِّلْ لَّنَا قِطَّنَا قَبْلَ يَوْمِ الْحِسَابِ ﴿١٧﴾

18. ඔවුන් පවසන දේ කෙරෙහි ඉවසිල්ලෙන් දරා සිටින්න. තවද අපගේ දාසයෙකු වන බලසම්පන්න දාවුද්ව සිහිපත් කරන්න. නියත වශයෙන්ම ඔහු සැමවිටම (දෙවියන් වෙතට) හැරෙන්නෙකු විය.

اِصْبِرْ عَلٰى مَا يَقُوْلُوْنَ وَاذْكُرْ عَبْدَنَا دَاوٗدَ ذَا الْاَيْدِ ۚ اِنَّهٗۤ اَوَّابٌ ﴿١٨﴾

*19. නියතවශයෙන්ම අපි (ඔහුට) කඳු සේවය සඳහා යොදවා ඇත්තෙමු. ඒවා ඔහු සමග අඳුර වැටෙන විටද හිරු උදාවන විටද දෙවියන්ගේ ප්‍රශංසාව සුවිශුද්ධ කරමින් සිටියහ.

اِنَّا سَخَّرْنَا الْجِبَالَ مَعَهٗ يُسَبِّحْنَ بِالْعَشِيِّ وَالْاِشْرَاقِ ۙ﴿١٩﴾

*20. තවද (අපි) එක්රැස් කළාවූ පක්ෂීන්වද (ඔහුට සේවයට යටත් කර දුන්නෙමු). සියල්ල ඔහු වෙතට හැරුණහ.

وَالطَّيْرَ مَحْشُوْرَةً ۗ كُلٌّ لَّهٗۤ اَوَّابٌ ﴿٢٠﴾

21. තවද අපි ඔහුගේ රාජ්‍යය ශක්තිමත් කළෙමු. තවද ඔහුට ප්‍රඥාවද තීරණාත්මක කථාව (සඳහා දක්ෂතාවය)ද දුන්නෙමු.

وَشَدَدْنَا مُلْكَهٗ وَاٰتَيْنٰهُ الْحِكْمَةَ وَفَصْلَ الْخِطَابِ ﴿٢١﴾

22. තවද (විවාදකරුවන් වන) ඔවුන් (ඔහුගේ) කුටියේ බිත්තිය මත නැග ආ විට විවාදකරුවන්ගේ වෘතාන්තය ඔබ වෙත පැමිණියේද?

وَهَلْ اَتٰىكَ نَبَؤُا الْخَصْمِ ۘ اِذْ تَسَوَّرُوا الْمِحْرَابَ ۙ﴿٢٢﴾

23. ඔවුන් දාවුද් ඉදිරියේ පැමිණි විට, ඔහු තිගැස්සුනේය. එයට ඔවුහු, 'බිය නොවන්න. (අපි) නඩු කියන දෙදෙනෙක් වෙමු. අපගෙන් කෙනෙකු අනෙකුට එරෙහිව සීමාව ඉක්මවා ඇත. එබැවින් අප අතර යුක්තිය සාධාරණව ඉටු කරන්න. තවද අසාධාරණ නොකරන්න. තවද අපව

اِذْ دَخَلُوْا عَلٰى دَاوٗدَ فَفَزِعَ مِنْهُمْ قَالُوْا لَا تَخَفْ ۚ خَصْمٰنِ بَغٰى بَعْضُنَا عَلٰى بَعْضٍ فَاحْكُمْ بَيْنَنَا بِالْحَقِّ وَلَا تُشْطِطْ

*සටහන: 19. මෙහිදී 'ජිබාල්' (කඳු) යන වචනය අදහස් වන්නේ දාවුද් විසින් යටත් කරගත් බලගතු කඳුකර ශ්‍රෝත්‍රිකයින් විය හැකිය. නැතහොත් එයින් කඳුකරයේ ඛණිජ සම්පත් අදහස් වන්නටද පුළුවන. මන්ද ඔහුගේ කාලයෙහි ඒවා උපරිම ප්‍රයෝජනයට ගැණින.

*සටහන: 20. 'අත්තයිර්' (පක්ෂීන්) යන වචනය සුවිශේෂ දක්ෂතාවයෙන් යුතු එමෙන්ම ඔවුන් ලබාගත් අධ්‍යාත්මික දෙයෙහි උසස් තත්ත්වයට පත් වන්නාවූ මිනිසුන් යන්න අදහස් විය හැක.

وَاهْدِنَآ إِلَىٰ سَوَآءِ الصِّرَاطِ ﴿٢٣﴾

නිවැරදි මගට යොමුකරන්නැ'යි කීහ.

إِنَّ هَٰذَآ أَخِى لَهُۥ تِسْعٌ وَتِسْعُونَ نَعْجَةً وَلِىَ نَعْجَةٌ وَٰحِدَةٌ فَقَالَ أَكْفِلْنِيهَا وَعَزَّنِى فِى ٱلْخِطَابِ ﴿٢٤﴾

24. "මොහු මාගේ සහෝදරයාය. මොහුට බැටළු දෙනුන් අනූ නවයක් ඇත. තවද, මට ඇත්තේ එකම බැටළු දෙනකි. එහෙත් මොහු 'එය මට දෙන්නැ'යි පවසයි. තවද මොහුගේ කතාවෙන් මොහු මා දිනා ඇත."

قَالَ لَقَدْ ظَلَمَكَ بِسُؤَالِ نَعْجَتِكَ إِلَىٰ نِعَاجِهِۦ ۖ وَإِنَّ كَثِيرًا مِّنَ ٱلْخُلَطَآءِ لَيَبْغِى بَعْضُهُمْ عَلَىٰ بَعْضٍ إِلَّا ٱلَّذِينَ ءَامَنُوا۟ وَعَمِلُوا۟ ٱلصَّٰلِحَٰتِ وَقَلِيلٌ مَّا هُمْ ۗ وَظَنَّ دَاوُۥدُ أَنَّمَا فَتَنَّٰهُ فَٱسْتَغْفَرَ رَبَّهُۥ وَخَرَّ رَاكِعًا وَأَنَابَ ﴿٢٥﴾ ۩

25. 'මොහුගේම බැටළුදෙනුන් සමග ඔබගේ බැටළු දෙනද (එකතු කිරීමට) ඉල්ලා සිටීමෙහිලා නියතවශයෙන්ම මොහු ඔබට වරදක් කර ඇත. නියතවශයෙන්ම කොටස්කරුවන් බොහොමයක් එකිනෙකාට එරෙහිව සීමාව ඉක්මවන්නෝය. (අල්ලාහ් කෙරෙහි) විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නන් හැරය. ඔවුන් අතලොස්සක්යැ'යි (දාවූද්) පැවසුවේය. දාවුද්ට, අප ඔහුව පිරික්සුවේයැයි වැටහුණි. එබැවින් ඔහු, ඔහුගේ අධිපතියාණන්ගෙන් සමාව අයැදිය. තවද නමස්කාරයෙහි (අවනතව) හිස පහළට නමා වැටුණේය. තවද (ඔහු වෙතටම) හැරුණේය.

فَغَفَرْنَا لَهُۥ ذَٰلِكَ ۖ وَإِنَّ لَهُۥ عِندَنَا لَزُلْفَىٰ وَحُسْنَ مَـَٔابٍ ﴿٢٦﴾

26. එබැවින් අපි ඔහුට එම (වැරැද්ද) සමා කළෙමු. තවද ඇත්තෙන්ම අප වෙත ඔහුට සමීපතාවයක්ද විශිෂ්ඨ නවාතැනක්ද තිබුණි.

يَٰدَاوُۥدُ إِنَّا جَعَلْنَٰكَ خَلِيفَةً فِى ٱلْأَرْضِ فَٱحْكُم بَيْنَ ٱلنَّاسِ بِٱلْحَقِّ وَلَا تَتَّبِعِ ٱلْهَوَىٰ فَيُضِلَّكَ عَن سَبِيلِ ٱللَّهِ ۚ إِنَّ ٱلَّذِينَ يَضِلُّونَ عَن سَبِيلِ ٱللَّهِ لَهُمْ عَذَابٌ شَدِيدٌۢ بِمَا نَسُوا۟ يَوْمَ ٱلْحِسَابِ ﴿٢٧﴾ ع

27. 'එම්බල දාවුද් අපි ඔබව පොළොවෙහි නියෝජිතයෙකු කර ඇත්තෙමු. එබැවින් මිනිසුන් අතර යුක්තිය සාධාරණව ඉටු කරන්න. තවද නිශ්චල ආශාවන් අනුගමනය නොකරන්න. නැතහොත් එය ඔබව අල්ලාහ්ගේ මාර්ගයෙන් නොමගට යොමු කරනු ඇත'. නියතවශයෙන්ම අල්ලාහ්ගේ මාර්ගයෙන් නොමග ගිය අය ගත්කල, ඔවුන් ගණන් ගැනීමේ දිනය අමතක කළ බැවින් ඔවුනට දැඩි දඬුවමක් ලැබෙනු ඇත.

28. තවද අපි අහසද පොළොවද ඒ දෙක අතර ඇති සියල්ලද නිකරුණේ නොමැව්වෙමු. එය අවිශ්වාස කරන අයගේ මතය වේ. එබැවින් අවිශ්වාසිත අයහට ගින්න හේතුවෙන් විපතකි.

وَمَا خَلَقْنَا السَّمَاءَ وَالْأَرْضَ وَمَا بَيْنَهُمَا بَاطِلًا ۚ ذَٰلِكَ ظَنُّ الَّذِينَ كَفَرُوا ۚ فَوَيْلٌ لِلَّذِينَ كَفَرُوا مِنَ النَّارِ ﴿٢٨﴾

29. අපි විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නන්ව පොළොවෙහි දූෂිතව ක්‍රියා කරන්නන්ට මෙන් එක සේ සළකන්නෙමුද? නැතහොත් අපි බියබැතිමතුන්ව දුෂ්ඩයින්ට මෙන් එක සේ සළකන්නෙමුද?

أَمْ نَجْعَلُ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ كَالْمُفْسِدِينَ فِي الْأَرْضِ أَمْ نَجْعَلُ الْمُتَّقِينَ كَالْفُجَّارِ ﴿٢٩﴾

30. (මෙය) ඔබ වෙත අප පහළ කළාවූ ආශිර්වාදයෙන් පිරි ග්‍රන්ථයකි. මෙහි වාක්‍යයන් ගැන ඔවුන් මෙනෙහි කරණු පිණිසද එමෙන්ම වටහාගැනීමේ භාග්‍යය ලද අය අනුශාසනා ලබනු පිණිසද වේ.

كِتَابٌ أَنْزَلْنَاهُ إِلَيْكَ مُبَارَكٌ لِيَدَّبَّرُوا آيَاتِهِ وَلِيَتَذَكَّرَ أُولُو الْأَلْبَابِ ﴿٣٠﴾

31. තවද අපි දාවුද්ට සුලෙයිමාන්ව පිරිනැමුවෙමු. ඔහු විශිෂ්ඨ වූ දාසයෙක් විය. ඔහු සැමවිටම (අප වෙත) හැරෙන්නෙකු විය.

وَوَهَبْنَا لِدَاوُودَ سُلَيْمَانَ ۚ نِعْمَ الْعَبْدُ ۖ إِنَّهُ أَوَّابٌ ﴿٣١﴾

32. සන්ධ්‍යා කාලයේදී වේගයෙන් හඹා යන්නාවූද උසස් ඝනයේ වූද ජව සම්පන්න අශ්වයින් ඔහු වෙත ගෙනඑනු ලැබූ කල්හි.

إِذْ عُرِضَ عَلَيْهِ بِالْعَشِيِّ الصَّافِنَاتُ الْجِيَادُ ﴿٣٢﴾

33. 'ශ්‍රේෂ්ඨ වස්තූන් කෙරෙහි මා ප්‍රිය කරන්නේ ඒවා මාගේ අධිපතියාණන්ව මාහට සිහි කරවන නිසායැ'යි ඔහු කීවේය. එබැවින් ඒවා තිරය පිටුපසින් නොපෙනී ගිය කල්හි,

فَقَالَ إِنِّي أَحْبَبْتُ حُبَّ الْخَيْرِ عَنْ ذِكْرِ رَبِّي حَتَّىٰ تَوَارَتْ بِالْحِجَابِ ﴿٣٣﴾

34. 'උන්ව මා වෙත ආපසු ගෙන එනු'යි (ඔහු කීවේය). පසුව ඔහු උන්ගේ කෙණ්ඩද ගෙළද අතින් පිරිමැදීමට පටන් ගත්තේය.

رُدُّوهَا عَلَيَّ ۖ فَطَفِقَ مَسْحًا بِالسُّوقِ وَالْأَعْنَاقِ ﴿٣٤﴾

35. තවද අපි සුලෙයිමාන්ව පිරික්සුවෙමු. එමෙන්ම අපි ඔහුගේ

وَلَقَدْ فَتَنَّا سُلَيْمَانَ وَأَلْقَيْنَا عَلَىٰ كُرْسِيِّهِ

جَسَدًا ثُمَّ اَنَابَ ۝٣٥

සිහසුන මත (හුදු) සිරුරක් තැබුවෙමු. පසුව ඔහු (දෙවියන්ගෙන් දයාව ඉල්ලමින් ඔහු වෙතට) හැරුණේය.

قَالَ رَبِّ اغْفِرْ لِيْ وَهَبْ لِيْ مُلْكًا لَّا يَنْۢبَغِيْ لِاَحَدٍ مِّنْۢ بَعْدِيْ ۚ اِنَّكَ اَنْتَ الْوَهَّابُ ۝٣٦

36. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! මා හට ක්ෂමාව දෙනු මැනව. තවද මාගෙන් පසුව නුසුදුසු කිසිවෙකුත් අයිති නොකර ගන්නාවූ රාජ්‍යයක් මා හට පිරිනමනු මැනව. නියතවශයෙන්ම ඔබ අධික ලෙස ත්‍යාගශීලියැ'යි කීවේය.

فَسَخَّرْنَا لَهُ الرِّيْحَ تَجْرِيْ بِاَمْرِهٖ رُخَاۤءً حَيْثُ اَصَابَ ۝٣٧

37. එබැවින් අපි ඔහුට සුළඟ සේවය පිණිස යොදවා ඇත්තෙමු. එය ඔහුගේ විධානයෙන් ඔහු යෑමට කැමති ඕනෑම තැනකට සිහිල්ව හමන්නට විය.

وَالشَّيٰطِيْنَ كُلَّ بَنَّاۤءٍ وَّغَوَّاصٍ ۝٣٨

38. එමෙන්ම යෝධයින්වද (එනම්) සියළු (වර්ගයේ) ගොඩනැගිලි ඉදි කරන්නන්වද (මුතු) කිමිදුම් කරුවන්වද,

وَّاٰخَرِيْنَ مُقَرَّنِيْنَ فِي الْاَصْفَادِ ۝٣٩

39. තවද විලංගුවලින් බඳින ලද අන් අයවද,

هٰذَا عَطَاۤؤُنَا فَامْنُنْ اَوْ اَمْسِكْ بِغَيْرِ حِسَابٍ ۝٤٠

40. 'මෙය අපගේ අසීමිත ත්‍යාගය වේ. එබැවින් ඉස්තරම්ව ලබා දෙන්න. නොඑසේනම් රඳවා තබාගන්න'.

ع وَاِنَّ لَهٗ عِنْدَنَا لَزُلْفٰى وَحُسْنَ مَاٰبٍ ۝٤١

41. තවද ඇත්තෙන්ම අප වෙත ඔහුට සමීපතාවයක්ද විශිෂ්ඨ නවාතැනක්ද තිබුණි.

وَاذْكُرْ عَبْدَنَآ اَيُّوْبَ ۘ اِذْ نَادٰى رَبَّهٗٓ اَنِّيْ مَسَّنِيَ الشَّيْطٰنُ بِنُصْبٍ وَّعَذَابٍ ۝٤٢

42. තවද අපගේ දාසයා වන අය්යූබ්ව සිහිපත් කරන්න. ඔහු තම අධිපතියාණන්ට, 'ෂෙයිතාන් මාහට දුක සහ වේදනාව පමුණුවා ඇතැ'යි (පවසමින්) හඬ නගා කියූ කල්හි,

اُرْكُضْ بِرِجْلِكَ ۚ هٰذَا مُغْتَسَلٌۢ بَارِدٌ وَّشَرَابٌ ۝٤٣

43. 'ඔබ පා විලුඹෙන් (ගමන් කිරීමට) උසි ගන්වන්න. එහි සෝදා ගැනීමට සහ පානය කිරීමට සිසිල් ජලය ඇත'.

وَوَهَبْنَا لَهُۥٓ أَهْلَهُۥ وَمِثْلَهُم مَّعَهُمْ رَحْمَةً مِّنَّا وَذِكْرَىٰ لِأُو۟لِى ٱلْأَلْبَٰبِ ﴿٤٤﴾

44. තවද අපි ඔහුට ඔහුගේ පවුලේ අයවද ඔවුන් සමගම ඔවුන්මෙන් බොහෝ අයවද අප වෙතින් දයාවක් ලෙස පිරිනැමුවෙමු. තවද වටහාගන්නා මිනිසුන්ට සිහිපත් කිරීමද (පිරිනැමුවෙමු).

وَخُذْ بِيَدِكَ ضِغْثًا فَٱضْرِب بِّهِۦ وَلَا تَحْنَثْ ۗ إِنَّا وَجَدْنَٰهُ صَابِرًا ۚ نِّعْمَ ٱلْعَبْدُ ۖ إِنَّهُۥٓ أَوَّابٌ ﴿٤٥﴾

45. තවද (අපි ඔහුට), 'වියලි අතු මිටක් ඔබ අතට ගෙන එයින් ගසනු. තවද ඔබගේ දිවුරුම කඩ නොකරන්නැ'(යි පැවැසුවෙමු). ඇත්තෙන්ම අපි ඔහුව ඉවසිලිවන්තයෙක්ව දුටුවෙමු. ඔහු විශිෂ්ඨ දාසයෙකු විය. නියත වශයෙන්ම ඔහු සැමවිටම (දෙවියන් වෙතට) හැරෙන්නෙකු විය.

وَٱذْكُرْ عِبَٰدَنَآ إِبْرَٰهِيمَ وَإِسْحَٰقَ وَيَعْقُوبَ أُو۟لِى ٱلْأَيْدِى وَٱلْأَبْصَٰرِ ﴿٤٦﴾

46. තවද බොහෝ බලසම්පන්න මෙන්ම අධ්‍යාත්මික දැක්ම ඇත්තවුන් වන අපගේ දාසයින් ඉබ්රාහිම් ඉස්හාක් සහ යඃකූබ්ව සිහිපත් කරන්න.

إِنَّآ أَخْلَصْنَٰهُم بِخَالِصَةٍ ذِكْرَى ٱلدَّارِ ﴿٤٧﴾

47. අපි ඔවුන්ව පරලොවේ වාසස්ථානය පිළිබඳව (ජනතාවට) මතක් කර දීමට විශේෂයෙන් තෝරාගත්තෙමු.

وَإِنَّهُمْ عِندَنَا لَمِنَ ٱلْمُصْطَفَيْنَ ٱلْأَخْيَارِ ﴿٤٨﴾

48. තවද සත්‍යයෙන්ම ඔවුන් අපගේ දැක්මෙහි තෝරාගන්නා ලද්දන් (මෙන්ම) ශ්‍රේෂ්ඨයින් අතර වූහ.

وَٱذْكُرْ إِسْمَٰعِيلَ وَٱلْيَسَعَ وَذَا ٱلْكِفْلِ ۖ وَكُلٌّ مِّنَ ٱلْأَخْيَارِ ﴿٤٩﴾

49. තවද ඉස්මාඊල්වද අල්යසඃවද දුල්කිෆ්ල්වද සිහිපත් කරන්න. තවද ඔවුන් සියල්ලන්ම ශ්‍රේෂ්ඨයින් අතර වූහ.

هَٰذَا ذِكْرٌ ۚ وَإِنَّ لِلْمُتَّقِينَ لَحُسْنَ مَـَٔابٍ ﴿٥٠﴾

50. මෙය සිහිපත් කරවීමකි. තවද නියතවශයෙන්ම බියබැතිමතුන්හට විශිෂ්ඨ වූ නවාතැනක් ඇත.

جَنَّٰتِ عَدْنٍ مُّفَتَّحَةً لَّهُمُ ٱلْأَبْوَٰبُ ﴿٥١﴾

51. නිත්‍ය උද්‍යානයන්ය, ඒවායෙහි දොරටු ඔවුනට විවෘත කරනු ලැබ ඇත.

مُتَّكِـِٔينَ فِيهَا يَدْعُونَ فِيهَا بِفَاكِهَةٍ كَثِيرَةٍ وَشَرَابٍ ﴿٥٢﴾

52. එහි (සෝපාවන් මත) හාන්සි වී සිටිමින් ඔවුන් එහි බහුලව ඇති පළතුරුද පානයද (සතුටින්) ගෙන්වා ගන්නෝය.

وَعِندَهُمْ قَٰصِرَٰتُ ٱلطَّرْفِ أَتْرَابٌ ﴿٥٣﴾

53. තවද පහතට හෙළන ලද බැල්මෙන් (සහ) සම වයසින් යුත් (පතිවත් රකින) සහකරුවන් ඔවුන් සමග සිටින්නෝය.

هَٰذَا مَا تُوعَدُونَ لِيَوْمِ ٱلْحِسَابِ ﴿٥٤﴾

54. මෙය ගණන් ගැනීමේ දිනය සඳහා නුඹලාට පොරොන්දු වූ දෙයකි.

إِنَّ هَٰذَا لَرِزْقُنَا مَا لَهُۥ مِن نَّفَادٍ ﴿٥٥﴾

55. සැබැවින්ම මෙය කිසිවිටෙකත් නිමා නොවන්නාවූ අපගේ ජීවනෝපාය වේ.

هَٰذَا ۚ وَإِنَّ لِلطَّٰغِينَ لَشَرَّ مَـَٔابٍ ﴿٥٦﴾

56. මෙය (විශ්වාසිතයින්හට) වේ. නමුත් කැරලිකරුවන් සඳහා ආපසු යෑමේ නපුරුම ස්ථානයක් ඇත.

جَهَنَّمَ يَصْلَوْنَهَا فَبِئْسَ ٱلْمِهَادُ ﴿٥٧﴾

57. නිරයයි, ඔවුහු එහි දැවෙන්නෝය. කෙතරම් නපුරු නවාතැනක්ද!

هَٰذَا فَلْيَذُوقُوهُ حَمِيمٌ وَغَسَّاقٌ ﴿٥٨﴾

58. මෙය (ඔවුන්ට ලැබෙන දේ) වේ. එබැවින් ඔවුන් එය විඳිත්වා! උතුරන්නාවූ ලෝදියකි. තවද අතිශයින්ම සීතල වූද දුගඳ වූද පානයකි.

وَءَاخَرُ مِن شَكْلِهِۦٓ أَزْوَٰجٌ ﴿٥٩﴾

59. තවද මෙවැනි ස්වභාවයෙන් යුත් අනෙකුත් (දඬුවම්)ද ඇත.

هَٰذَا فَوْجٌ مُّقْتَحِمٌ مَّعَكُمْ ۖ لَا مَرْحَبًۢا بِهِمْ ۚ إِنَّهُمْ صَالُوا۟ ٱلنَّارِ ﴿٦٠﴾

60. 'මෙය නුඹලා සමග කඩිමුඩියෙන් ඇදී එන්නාවූ (නුඹලාගේ) සේනාවයි (එම්බල දුෂ්ඨයින්ගේ නායකයිනි!)'. ඔවුන්ට කිසිදු සාදර පිළිගැනීමක් නොමැත. ඔවුන් ගින්නෙහි දැවිය යුතුමය.

قَالُوا۟ بَلْ أَنتُمْ لَا مَرْحَبًۢا بِكُمْ ۖ أَنتُمْ قَدَّمْتُمُوهُ لَنَا ۖ فَبِئْسَ ٱلْقَرَارُ ﴿٦١﴾

61. (එයට) ඔවුහු, 'නොඑසේය, එය නුඹලාමය. නුඹලාට (සත්‍යයෙහි) කිසිදු සාදර පිළිගැනීමක් නොමැත. මෙය අප වෙනුවෙන් පිළියෙළ කළ අය නුඹලාමය. එබැවින් මෙය කෙතරම් නපුරු ගිමන් ස්ථානයක්දැ!'යි කියන්නෝය.

62. (තවද) ඔවුහු, 'අපගේ අධිපතියාණෙනි! කවුරුන්හෝ මෙය අප වෙනුවෙන් පිළියෙල කළේද ඔහුට ගින්නෙහි දෙගුණ දඬුවම එක් කරනු මැනවැ'යි කියන්නෝය.

قَالُوا رَبَّنَا مَنْ قَدَّمَ لَنَا هَٰذَا فَزِدْهُ عَذَابًا ضِعْفًا فِي النَّارِ ﴿٦٢﴾

63. තවද (නිරයේ වූ) ඔවුහු, 'දුෂ්ඨයින්ගෙන් යැයි අප ගණන් ගනිමින් සිටි මිනිසුන්ව අප නොදකින්නට අපට කුමක් සිදුවුයේදැ?'යි පවසන්නෝය.

وَقَالُوا مَا لَنَا لَا نَرَىٰ رِجَالًا كُنَّا نَعُدُّهُمْ مِنَ الْأَشْرَارِ ﴿٦٣﴾

64. 'අපි ඔවුන්ව (අසාධාරණව) සමච්චලයට ගත් නිසාද, නැතහොත් ඇස් ඔවුන්ව මග හැරිය නිසාද?'

أَتَّخَذْنَاهُمْ سِخْرِيًّا أَمْ زَاغَتْ عَنْهُمُ الْأَبْصَارُ ﴿٦٤﴾

65. සැබැවින්ම නිරයේ වැසියන් එකිනෙකා අතර වන මෙම ආරවුල සත්‍යයකි.

إِنَّ ذَٰلِكَ لَحَقٌّ تَخَاصُمُ أَهْلِ النَّارِ ﴿٦٥﴾

66. පවසන්න, 'මම අවවාදකරුවෙකු පමණි. තවද එකම සහ පරම මහෝත්තමයා අල්ලාහ් හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නොමැත'.

قُلْ إِنَّمَا أَنَا مُنْذِرٌ ۖ وَمَا مِنْ إِلَٰهٍ إِلَّا اللَّهُ الْوَاحِدُ الْقَهَّارُ ﴿٦٦﴾

67. 'අහස් මෙන්ම පොළොවේද ඒ දෙක අතර සියල්ලේද අධිපතියාණන් බලසම්පන්නය, බෙහෙවින් ක්ෂමාශීලිය'.

رَبُّ السَّمَاوَاتِ وَالْأَرْضِ وَمَا بَيْنَهُمَا الْعَزِيزُ الْغَفَّارُ ﴿٦٧﴾

68. පවසන්න, 'එය මහත් පුවතකි'.

قُلْ هُوَ نَبَأٌ عَظِيمٌ ﴿٦٨﴾

69. 'නුඹලා එයින් ඉවත හැරෙන්නෙහුය'.

أَنْتُمْ عَنْهُ مُعْرِضُونَ ﴿٦٩﴾

70. 'ඔවුන්(සුර දූතයින්) තමන් අතර සාකච්ඡා කළ විට අති උසස් වූ (එම) සභාව ගැන මට කිසිදු දැනුමක් නොවීය'.

مَا كَانَ لِيَ مِنْ عِلْمٍ بِالْمَلَإِ الْأَعْلَىٰ إِذْ يَخْتَصِمُونَ ﴿٧٠﴾

71. 'නමුත් මෙය, මා විවෘත අවවාද කරුවෙකු පමණක් බව මාහට අනාවරණය කරනු ලැබූ දෙයකි'.

إِنْ يُوحَىٰ إِلَيَّ إِلَّا أَنَّمَا أَنَا نَذِيرٌ مُبِينٌ ﴿٧١﴾

72. ඔබගේ අධිපතියාණන්, 'මම මිනිසාව මැටිපසින් මවන්නට යමි'යි සුරදූතයින්ට මෙසේ පැවසූ කල්හි,

إِذْ قَالَ رَبُّكَ لِلْمَلَٰٓئِكَةِ إِنِّى خَٰلِقٌۢ بَشَرًا مِّن طِينٍ ﴿٧٢﴾

73. 'පසුව මා ඔහුව (අංග සම්පූර්ණව) හැඩ ගස්වා ඔහු තුල මාගේ ආත්මය පිඹූ කල්හි නුඹලා ඔහුට අවනතව වැටෙනු'.

فَإِذَا سَوَّيْتُهُۥ وَنَفَخْتُ فِيهِ مِن رُّوحِى فَقَعُوا۟ لَهُۥ سَٰجِدِينَ ﴿٧٣﴾

74. එබැවින් සුරදූතයින් සියල්ලෝම එක්ව අවනත වූහ.

فَسَجَدَ ٱلْمَلَٰٓئِكَةُ كُلُّهُمْ أَجْمَعُونَ ﴿٧٤﴾

75. නමුත් ඉබ්ලීස් (නොවීය). ඔහු අහංකාරව හැසිරුණේය. තවද අවිශ්වාසිතයින්ගෙන් විය.

إِلَّآ إِبْلِيسَ ٱسْتَكْبَرَ وَكَانَ مِنَ ٱلْكَٰفِرِينَ ﴿٧٥﴾

76. (එයට දෙවියන්) 'එම්බා ඉබ්ලීස්! මාගේ දෑතින් මා මවා ඇති දෙයට අවනතවීමෙන් නුඹව වැළැක්වූයේ කුමක්ද? නුඹ අහංකාරය හේතුවෙන් එසේ හැසිරුණේද නැතහොත් ඇත්තෙන්ම නුඹ ඉතා උසස් අයගෙන් කෙනෙක් වන්නෙහිදැ?'යි පැවසුවේය.

قَالَ يَٰٓإِبْلِيسُ مَا مَنَعَكَ أَن تَسْجُدَ لِمَا خَلَقْتُ بِيَدَىَّ ۖ أَسْتَكْبَرْتَ أَمْ كُنتَ مِنَ ٱلْعَالِينَ ﴿٧٦﴾

77. ඔහු, 'මම ඔහුට වඩා විශිෂ්ඨ වෙමි. ඔබ මා මවා ඇත්තේ ගින්නෙන්ය. එහෙත් ඔබ ඔහුව මවා ඇත්තේ මැටි පසින් යැ'යි කීවේය.

قَالَ أَنَا۠ خَيْرٌ مِّنْهُ ۖ خَلَقْتَنِى مِن نَّارٍ وَخَلَقْتَهُۥ مِن طِينٍ ﴿٧٧﴾

78. (දෙවියන්) 'එසේනම්, මෙතැනින් පිටව යනු. මන්ද නියතවශයෙන්ම නුඹ පලවා හරින ලද්දෙහියැ'යි පැවසුවේය.

قَالَ فَٱخْرُجْ مِنْهَا فَإِنَّكَ رَجِيمٌ ﴿٧٨﴾

79. 'තවද විනිශ්චය දිනය තෙක් නියතවශයෙන්ම නුඹ මත මාගේ ශාපය වනු ඇත'.

وَإِنَّ عَلَيْكَ لَعْنَتِىٓ إِلَىٰ يَوْمِ ٱلدِّينِ ﴿٧٩﴾

80. ඔහු, 'මාගේ අධිපතියාණෙනි! එසේනම් ඔවුන් නැගිටුවනු ලබන දිනය තෙක් මා හට කාල අවකාශය දෙනු මැනවැ'යි පැවසුවේය.

قَالَ رَبِّ فَأَنظِرْنِىٓ إِلَىٰ يَوْمِ يُبْعَثُونَ ﴿٨٠﴾

| | |
|---|---|
| 81. (දෙවියන්), 'නිශ්චිතවම නුඹද කාල අවකාශය දෙනු ලැබුවන්ගෙන් යැ'යි පැවසුවේය. | قَالَ فَإِنَّكَ مِنَ الْمُنْظَرِيْنَ ﴿٨١﴾ |
| 82. 'නියමිත කාලයේ එම දිනය දක්වා' | إِلَى يَوْمِ الْوَقْتِ الْمَعْلُوْمِ ﴿٨٢﴾ |
| 83. (එයට) ඔහු, 'එසේනම් ඔබගේ බලමහිමයේ නාමයෙන් නියතවශයෙන්ම මම ඔවුන් සියල්ලන්ව නොමග යවන්නෙමි'යි කීවේය. | قَالَ فَبِعِزَّتِكَ لَأُغْوِيَنَّهُمْ أَجْمَعِيْنَ ﴿٨٣﴾ |
| 84. 'ඔවුන් අතුරින් තෝරාගන්නා ලද ඔබගේ දාසයින් හැරය'. | إِلَّا عِبَادَكَ مِنْهُمُ الْمُخْلَصِيْنَ ﴿٨٤﴾ |
| 85. (දෙවියන්) 'එසේනම්, සත්‍යය එයමය. තවද මම සත්‍යය පවසන්නෙමි'යි පැවසුවේය. | قَالَ فَالْحَقُّ وَالْحَقَّ أَقُوْلُ ﴿٨٥﴾ |
| 86. '(එනම්) මම නිශ්චිතවම නුඹගෙන් සහ නුඹව අනුගමනය කරන සියල්ලන්ගෙන් නිරය පුරවන්නෙමි'. | لَأَمْلَئَنَّ جَهَنَّمَ مِنْكَ وَمِمَّنْ تَبِعَكَ مِنْهُمْ أَجْمَعِيْنَ ﴿٨٦﴾ |
| 87. පවසන්න, 'මම මෙය සඳහා නුඹලාගෙන් කිසිදු තිළිණයක් නොඉල්ලමි, එසේම, මම බොරු රඟපෑම් පෙන්වන්නන්ගෙන්ද නොවෙමි'. | قُلْ مَا أَسْئَلُكُمْ عَلَيْهِ مِنْ أَجْرٍ وَّمَا أَنَا مِنَ الْمُتَكَلِّفِيْنَ ﴿٨٧﴾ |
| 88. 'මෙය (සියලු) ජනතාවන්ට සිහිකරවීමක් මිස අන්කිසිවක් නොවේ'. | إِنْ هُوَ إِلَّا ذِكْرٌ لِّلْعٰلَمِيْنَ ﴿٨٨﴾ |
| 89. 'තවද නුඹලා නියතවශයෙන්ම ටික කලකට පසු මෙහි සත්‍යතාවය දැනගන්නෙහුය'. | وَلَتَعْلَمُنَّ نَبَأَهُ بَعْدَ حِيْنٍ ﴿٨٩﴾ |



## අල් zසුමර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

تَنْزِيْلُ الْكِتٰبِ مِنَ اللّٰهِ الْعَزِيْزِ الْحَكِيْمِ ②

2. මෙම ග්‍රන්ථයේ පහළ වීම බලසම්පන්න වූද ප්‍රඥාසම්පන්න වූද අල්ලාහ්ගෙන්ය.

اِنَّآ اَنْزَلْنَآ اِلَيْكَ الْكِتٰبَ بِالْحَقِّ فَاعْبُدِ اللّٰهَ مُخْلِصًا لَّهُ الدِّيْنَ ③

3. නියතවශයෙන්ම මෙම ග්‍රන්ථය සත්‍යය සමගින් ඔබ වෙත පහළ කලේ අපිමය. එබැවින් අල්ලාහ්ව මුළු අවංකකමින් ඔබගේ විශ්වාසය ඔහුට කැපකරමින් නමදින්න.

اَلَا لِلّٰهِ الدِّيْنُ الْخَالِصُ ؕ وَالَّذِيْنَ اتَّخَذُوْا مِنْ دُوْنِهٖٓ اَوْلِيَآءَ ۘ مَا نَعْبُدُهُمْ اِلَّا لِيُقَرِّبُوْنَآ اِلَى اللّٰهِ زُلْفٰى ؕ اِنَّ اللّٰهَ يَحْكُمُ بَيْنَهُمْ فِيْ مَا هُمْ فِيْهِ يَخْتَلِفُوْنَ ۬ اِنَّ اللّٰهَ لَا يَهْدِيْ مَنْ هُوَ كٰذِبٌ كَفَّارٌ ④

4. සවන්දෙනු, අවංක අවනත වීම අල්ලාහ්ට පමණි. තවද ඔහු හැර අන් අයව ආරක්ෂකයින් ලෙස ගන්නා අය, 'ඔවුන් අපව අල්ලාහ් වෙත සමීපතාවයට ගෙන එනු පිණිස අපි ඔවුන්ට වඳින්නෙමු'(යි පවසන්නෝය). නියතවශයෙන්ම අල්ලාහ් ඔවුන් ඇති කරමින් සිටින මතභේද සම්බන්ධයෙන් ඔවුනතර විනිශ්චය කරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් අකෘතඥ මුසාවාදී අයහට මග නොපෙන්වයි.

لَوْ اَرَادَ اللّٰهُ اَنْ يَّتَّخِذَ وَلَدًا لَّاصْطَفٰى مِمَّا يَخْلُقُ مَا يَشَآءُ ۙ سُبْحٰنَهٗ ؕ هُوَ اللّٰهُ الْوَاحِدُ الْقَهَّارُ ⑤

5. අල්ලාහ් තමාට පුතෙකු ගැනීමට කැමති වූයේ නම්, ඔහු මවන දෙයින් ඔහු අභිමත ඕනෑම කෙනෙකුව ඔහුට තෝරාගැනීමට තිබුණි. ඔහු සුවිශුද්ධය! ඔහු අල්ලාහ්ය, එකම පරම මහෝත්තමයාය.

خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ بِالْحَقِّ ۚ يُكَوِّرُ الَّيْلَ عَلَى النَّهَارِ وَيُكَوِّرُ النَّهَارَ عَلَى الَّيْلِ

6. ඔහු අහස්ද පොළොවද සත්‍යය සමග මැව්වේය. ඔහු රාත්‍රිය දහවල මත ආවරණය කරන්නට සලස්වන්නේය. එමෙන්ම ඔහු දහවල රාත්‍රිය මතද ආවරණය කරන්නට සලස්වන්නේය. තවද ඔහු ඉර සහ

وَسَخَّرَ الشَّمْسَ وَالْقَمَرَ ۖ كُلٌّ يَجْرِي لِأَجَلٍ مُسَمًّى ۗ أَلَا هُوَ الْعَزِيزُ الْغَفَّارُ ٦

සඳ සේවය සඳහා යොදවා ඇත්තේය. මේ සියල්ල නියමිත කාලයක් තෙක් සිය පථයේ ගමන් කරයි. සවන් දෙනු. ඔහුම බලසම්පන්නය, බෙහෙවින් ක්ෂමාශීලීය.

خَلَقَكُمْ مِنْ نَفْسٍ وَاحِدَةٍ ثُمَّ جَعَلَ مِنْهَا زَوْجَهَا وَأَنْزَلَ لَكُمْ مِنَ الْأَنْعَامِ ثَمَانِيَةَ أَزْوَاجٍ ۚ يَخْلُقُكُمْ فِي بُطُونِ أُمَّهَاتِكُمْ خَلْقًا مِنْ بَعْدِ خَلْقٍ فِي ظُلُمَاتٍ ثَلَاثٍ ۚ ذَٰلِكُمُ اللَّهُ رَبُّكُمْ لَهُ الْمُلْكُ ۖ لَا إِلَٰهَ إِلَّا هُوَ ۖ فَأَنَّىٰ تُصْرَفُونَ ٧

7. ඔහු නුඹලාව එක් ජීවියෙකුගෙන් මැව්වේය. පසුව ඔහු එයින් එයගේ සහකරු ඇති කළේය. පසුව ඔහු ගව සතුන්ගෙන් ජෝඩු අටක් වශයෙන් පහළ කළේය. ඔහු නුඹලාව නුඹලාගේ මව්වරුන්ගේ ගර්භාෂයන්හි මැවීමකින් පසු මැවීමක් වශයෙන් අන්ධකාර පියවර තුනකින් මවන්නේය. නුඹලාගේ අධිපතියාණන් වන මෙවැන්නා අල්ලාහ්ය. රාජ්‍යය ඔහුටය. ඔහු හැර නැමදීමට සුදුස්සා අන්කිසිවෙක් නොමැත. එසේනම් නුඹලා කොහේ හරවනු ලබන්නෙහුද?

إِنْ تَكْفُرُوا فَإِنَّ اللَّهَ غَنِيٌّ عَنْكُمْ ۖ وَلَا يَرْضَىٰ لِعِبَادِهِ الْكُفْرَ ۖ وَإِنْ تَشْكُرُوا يَرْضَهُ لَكُمْ ۗ وَلَا تَزِرُ وَازِرَةٌ وِزْرَ أُخْرَىٰ ۗ ثُمَّ إِلَىٰ رَبِّكُمْ مَرْجِعُكُمْ فَيُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ تَعْمَلُونَ ۚ إِنَّهُ عَلِيمٌ بِذَاتِ الصُّدُورِ ٨

8. නුඹලා අකෘතඥ වන්නේ නම්, නියතවශයෙන්ම අල්ලාහ් නුඹලාගෙන් (නිදහස් මෙන්ම) ස්වයංපෝෂිතය. ඔහු තම දාසයින් තුල අකෘතඥවීම ප්‍රිය නොකරන්නේය. නමුත් නුඹලා කෘතඥතාවය දක්වන්නේ නම් ඔහු එය නුඹලා තුල කැමති වන්නේය. තවද කිසිදු බර උසුලන්නෙක් අනෙකාගේ බර නොඋසුලන්නේය. පසුව නුඹලාගේ ආපසු පැමිණීම නුඹලාගේ අධිපතියාණන් වෙතය. තවද ඔහු නුඹලා කරමින් සිටි දේ පිළිබඳව නුඹලාට දන්වන්නේය. නියතවශයෙන්ම ඔහු සිත්හි සැඟවුනු සියළු දේ මැනැවින් දන්නේය.

وَإِذَا مَسَّ الْإِنْسَانَ ضُرٌّ دَعَا رَبَّهُ مُنِيبًا إِلَيْهِ ثُمَّ إِذَا خَوَّلَهُ نِعْمَةً مِنْهُ نَسِيَ مَا كَانَ يَدْعُو إِلَيْهِ مِنْ قَبْلُ وَجَعَلَ لِلَّهِ أَنْدَادًا

9. තවද මිනිසෙකුට විපතක් අත්වන විට හෙතෙම තම අධිපතියාණන්ව කැඳවන්නේ, ඔහු වෙතට (පසුතැවිලිව) හැරෙමින්ය. ඔහු තමා වෙතින් අනුග්‍රහයක් හෙතෙමට පිරිනමන විට හෙතෙම පෙර අයැදමින් සිටි දේ අමතක

لِّيُضِلَّ عَنْ سَبِيلِهِ ۚ قُلْ تَمَتَّعْ بِكُفْرِكَ قَلِيلًا ۖ إِنَّكَ مِنْ أَصْحَابِ النَّارِ ٩

කරන්නේය. තවද හෙතෙම ඔහුගේ මාර්ගයෙන් (මිනිසුන්ව) නොමග යවනු පිණිස අල්ලාහ්ට සමානයන් තබන්නට පටන් ගන්නේය. පවසන්න, 'නුඹ තම අවිශ්වාසය සමග ටික කලකට ප්‍රයෝජන ලබනු. නියතවශයෙන්ම නුඹ ගින්නේ සහකරුවන්ගෙන් වන්නෙහිය'.

أَمَّنْ هُوَ قَانِتٌ آنَاءَ اللَّيْلِ سَاجِدًا وَقَائِمًا يَحْذَرُ الْآخِرَةَ وَيَرْجُو رَحْمَةَ رَبِّهِ ۗ قُلْ هَلْ يَسْتَوِي الَّذِينَ يَعْلَمُونَ وَالَّذِينَ لَا يَعْلَمُونَ ۗ إِنَّمَا يَتَذَكَّرُ أُولُو الْأَلْبَابِ ١٠

10. රාත්‍රියේ හෝරාවන්හි (නමස්කාරයෙහි) දණින් වැටෙමින්ද සිටගනිමින්ද (එමෙන්ම) පරලොවට බිය වෙමින්ද තම අධිපතියාණන්ගේ දයාව අපේක්ෂා කරමින්ද (දෙවියන්ට) නමදින ඔහු (එසේ නොකරන අයට සමාන වේද?) පවසන්න, 'දන්නා අය නොදන්නා අයට සමාන විය හැකිද?' සැබැවින්ම වටහාගන්නන්ම අනුශාසනා ලබන්නෝය.

قُلْ يَا عِبَادِ الَّذِينَ آمَنُوا اتَّقُوا رَبَّكُمْ ۚ لِلَّذِينَ أَحْسَنُوا فِي هَٰذِهِ الدُّنْيَا حَسَنَةٌ ۗ وَأَرْضُ اللَّهِ وَاسِعَةٌ ۗ إِنَّمَا يُوَفَّى الصَّابِرُونَ أَجْرَهُمْ بِغَيْرِ حِسَابٍ ١١

11. පවසන්න, 'එම්බල විශ්වාසිත මාගේ දාසයිනි, නුඹලාගේ අධිපතියාණන්ට බිය බැතිමත්වනු. මෙලෝ ජීවිතයෙහි යහපත කරන අයහට යහපතම ඇත. තවද අල්ලාහ්ගේ පොළොව ව්‍යාප්තය. සැබැවින්ම ස්ථිරසාරව සිටින්නන් තමන්ගේ තිළිණය අප්‍රමාණව ලබන්නෝය'.

قُلْ إِنِّي أُمِرْتُ أَنْ أَعْبُدَ اللَّهَ مُخْلِصًا لَّهُ الدِّينَ ١٢

12. පවසන්න, 'සැබැවින්ම ධර්මයෙහි අල්ලාහ්ව, ඔහුට අවංකව මා නැමදිය යුතුයැයි මම අණ කරන ලද්දෙමි'.

وَأُمِرْتُ لِأَنْ أَكُونَ أَوَّلَ الْمُسْلِمِينَ ١٣

13. 'තවද (ඔහුට) යටහත් වන්නන්ගේ ප්‍රථමයා වීමටද මා අණ කරන ලද්දෙමි'.

قُلْ إِنِّي أَخَافُ إِنْ عَصَيْتُ رَبِّي عَذَابَ يَوْمٍ عَظِيمٍ ١٤

14. පවසන්න, 'මාගේ අධිපතියාණන්ට මා අකීකරු වුවහොත් මහත් වූ දිනයක දඬුවමට ඇත්තෙන්ම මම බියවන්නෙමි'.

15. පවසන්න, 'මාගේ ධර්මයෙහි අල්ලාහ්ට පමණක් ඔහුට අවංක වෙමින් මම නමදින්නෙමි'.

قُلِ اللّٰهَ اَعۡبُدُ مُخۡلِصًا لَّهٗ دِيۡنِىۡ ۙ ﴿١٥﴾

16. 'එබැවින් ඔහු හැර නුඹලා කැමති ඕනෑම දෙයක් නමදිනු'. පවසන්න, 'නියතවශයෙන්ම පාඩු විඳින්නන් වන්නේ පුනරුත්ථාන දිනයේදී තමන්ගේ ආත්මයන්ට හානි කරගන්නා මෙන්ම තමන්ගේ පවුල් වලට (හානි කරන) අයමය. ප්‍රවේසම් වනු! එය නියතවශයෙන්ම ප්‍රකට පාඩු විඳීමක් වනු ඇත'.

فَاعۡبُدُوۡا مَا شِئۡتُمۡ مِّنۡ دُوۡنِهٖ ؕ قُلۡ اِنَّ الۡخٰسِرِيۡنَ الَّذِيۡنَ خَسِرُوۡۤا اَنۡفُسَهُمۡ وَاَهۡلِيۡهِمۡ يَوۡمَ الۡقِيٰمَةِ ؕ اَلَا ذٰلِكَ هُوَ الۡخُسۡرَانُ الۡمُبِيۡنُ ﴿١٦﴾

17. ඔවුන්ට ඉහළින් ගින්නේ සෙවණැලිද ඔවුන්ට පහළින් (එවැනිම) සෙවණැලිද වනු ඇත. මේ සම්බන්ධයෙන් අල්ලාහ්, තම දාසයින්හට අනතුරු අඟවන්නේය. 'එනම් එම්බල මාගේ දාසයිනි! මා හට පමණක් බිය බැතිමත් වනු'.

لَهُمۡ مِّنۡ فَوۡقِهِمۡ ظُلَلٌ مِّنَ النَّارِ وَمِنۡ تَحۡتِهِمۡ ظُلَلٌ ؕ ذٰلِكَ يُخَوِّفُ اللّٰهُ بِهٖ عِبَادَهٗ ؕ يٰعِبَادِ فَاتَّقُوۡنِ ﴿١٧﴾

18. තවද ව්‍යාජ දෙවිවරුන්ගෙන් වැළකී ඔවුන්ට වැඳුම් නොකර අල්ලාහ් වෙත හැරෙන්නන් ගත්කළ ඔවුන්ට ශුභාරංචි ඇත. එබැවින් මාගේ දාසයින්හට ශුභාරංචිය දෙන්න.

وَالَّذِيۡنَ اجۡتَنَبُوا الطَّاغُوۡتَ اَنۡ يَّعۡبُدُوۡهَا وَاَنَابُوۡۤا اِلَى اللّٰهِ لَهُمُ الۡبُشۡرٰى ۚ فَبَشِّرۡ عِبَادِ ۙ ﴿١٨﴾

19. එවැනි අය එම වදනට සවන් දෙති. තවද එයින් විශිෂ්ඨ දේ අනුගමනය කරති. අල්ලාහ් මඟ පෙන්වා ඇත්තේ ඔවුන්ටමය. තවද වටහා ගන්නා මිනිසුන් වන්නේ ඔවුන්මය.

الَّذِيۡنَ يَسۡتَمِعُوۡنَ الۡقَوۡلَ فَيَتَّبِعُوۡنَ اَحۡسَنَهٗ ؕ اُولٰٓـئِكَ الَّذِيۡنَ هَدٰٮهُمُ اللّٰهُ وَاُولٰٓـئِكَ هُمۡ اُولُوا الۡاَلۡبَابِ ﴿١٩﴾

20. එසේනම් යමෙකුට එරෙහිව දඬුවමේ තීන්දුව නියමවී ඇත්තේද (ඔහුට බේරිය හැකිද?) ගින්නෙහි ඇති අයව ඔබට මුදවා ගතහැකිද?

اَفَمَنۡ حَقَّ عَلَيۡهِ كَلِمَةُ الۡعَذَابِ ؕ اَفَاَنۡتَ تُنۡقِذُ مَنۡ فِى النَّارِ ۚ ﴿٢٠﴾

21. නමුත් තම අධිපතියාණන්ට බිය බැතිමත් වන අයහට සුවිසල් මැදුරු

لٰكِنِ الَّذِيۡنَ اتَّقَوۡا رَبَّهُمۡ لَهُمۡ غُرَفٌ مِّنۡ

فَوۡقِهَا غُرَفٌ مَّبۡنِيَّةٌ ۙ تَجۡرِىۡ مِنۡ تَحۡتِهَا الۡاَنۡهٰرُ ؕ وَعۡدَ اللّٰهِ ؕ لَا يُخۡلِفُ اللّٰهُ الۡمِيۡعَادَ ﴿۲۱﴾

ඇත. ඒවා මත තවත් සුවිසල් මැදුරු ගොඩ නංවා ඇත. ඒවාට පහළින් ගංගාවන් ගලා බසී. (මෙය) අල්ලාහ්ගේ පොරොන්දුවයි. (තවද) අල්ලාහ් (තම) පොරොන්දු කඩ නොකරන්නේය.

اَلَمۡ تَرَ اَنَّ اللّٰهَ اَنۡزَلَ مِنَ السَّمَآءِ مَآءً فَسَلَكَهٗ يَنَابِيۡعَ فِى الۡاَرۡضِ ثُمَّ يُخۡرِجُ بِهٖ زَرۡعًا مُّخۡتَلِفًا اَلۡوَانُهٗ ثُمَّ يَهِيۡجُ فَتَرٰٮهُ مُصۡفَرًّا ثُمَّ يَجۡعَلُهٗ حُطَامًا ؕ اِنَّ فِىۡ ذٰ لِكَ لَذِكۡرٰى لِاُولِى الۡاَلۡبَابِ ﴿۲۲﴾

22. අල්ලාහ් අහසින් ජලය පහළ කර එමෙන්ම පොළොවෙහි දිය දහරාවන් ගලායෑමට සලස්වා තවද එමගින් විවිධ වර්ණ වලින් යුත් ශාක හටගන්වන සැටි ඔබ දැක නොතිබේද? පසුව එය වියළි බවට පත්ව එය කහ පැහැයට හැරෙනු ඔබ දකින්නෙහිය. පසුව ඔහු එය පිදුරු කැබලි බවට පත්කරන්නේය. සැබැවින්ම එහිලා වටහාගන්නා මිනිසුන්ට අනුශාසනාවක් ඇත.

اَفَمَنۡ شَرَحَ اللّٰهُ صَدۡرَهٗ لِلۡاِسۡلَامِ فَهُوَ عَلٰى نُوۡرٍ مِّنۡ رَّبِّهٖ ؕ فَوَيۡلٌ لِّلۡقٰسِيَةِ قُلُوۡبُهُمۡ مِّنۡ ذِكۡرِ اللّٰهِ ؕ اُولٰٓٮِٕكَ فِىۡ ضَلٰلٍ مُّبِيۡنٍ ﴿۲۳﴾

23. අල්ලාහ් යමෙකුගේ සිත ඉස්ලාමය (වැළඳ ගැනීම)ට විවෘත කොට එමෙන්ම ඔහුට තම අධිපතියාණන්ගෙන් ආලෝකය හිමිව තිබේද ඔහු (අවිශ්වාසයේ අන්ධකාරයෙහි හසුවී සිටින්නාට සමාන වේද)? එමෙන්ම අල්ලාහ්ව සිහි කිරීමට එරෙහිව කවුරුන්ගේ හෝ හදවත් දැඩිව තිබේද, ඔවුනට විපතකි! ඔවුහු ප්‍රත්‍යක්ෂ වරදෙහිය.

اَللّٰهُ نَزَّلَ اَحۡسَنَ الۡحَدِيۡثِ كِتٰبًا مُّتَشَابِهًا مَّثَانِىَ ۖ تَقۡشَعِرُّ مِنۡهُ جُلُوۡدُ الَّذِيۡنَ يَخۡشَوۡنَ رَبَّهُمۡ ۚ ثُمَّ تَلِيۡنُ جُلُوۡدُهُمۡ وَقُلُوۡبُهُمۡ اِلٰى ذِكۡرِ اللّٰهِ ؕ ذٰ لِكَ هُدَى اللّٰهِ يَهۡدِىۡ بِهٖ مَنۡ يَّشَآءُ ؕ وَمَنۡ يُّضۡلِلِ اللّٰهُ فَمَا لَهٗ مِنۡ هَادٍ ﴿۲۴﴾

24. අල්ලාහ් අන්‍යෝන්‍යව ආධාර කරන්නාවූද (විවිධාකාරයෙන්) නැවත නැවතත් සඳහන් කරන්නා වූද ග්‍රන්ථයක් ලෙස විශිෂ්ඨ වූ පණිවිඩය පහළ කළේය. ඒවා(යෙහි වාක්‍යයන්) මගින් තම අධිපතියාණන්ට බිය දක්වන අයගේ සම් හිරි වැටෙන්නේය. පසුව අල්ලාහ්ව සිහි කිරීම වෙතට ඔවුන්ගේ සම් හා ඔවුන්ගේ හදවත් මෘදු වන්නේය. අල්ලාහ්ගේ මග පෙන්වීම මෙවැන්නකි. ඔහු තමා අභිමත අයහට මෙමගින් මග පෙන්වන්නේය. තවද අල්ලාහ් යමෙකුව නොමග යන්නට ඉඩ හරින්නේද ඔහුට කිසිදු මගපෙන්වන්නෙකු නොවනු ඇත.

أَفَمَنْ يَتَّقِي بِوَجْهِهِ سُوٓءَ الْعَذَابِ يَوْمَ الْقِيٰمَةِ ۚ وَقِيلَ لِلظّٰلِمِينَ ذُوقُوا مَا كُنْتُمْ تَكْسِبُونَ ﴿٢٥﴾

25. එසේනම්, පුනරුත්ථාන දිනයේ නපුරු වූ දඬුවමින් ආරක්ෂාකර ගැනීමට තම මුහුණ පමණක් පලිහයක් කර ගන්නා ඔහු (සුරක්ෂිත අයට සමාන වේද?) තවද 'නුඹලා උපයමින් සිටි දේ විඳිනු'යි වැරදි කරන්නන් හට පවසනු ලබන්නේය.

كَذَّبَ الَّذِينَ مِنْ قَبْلِهِمْ فَأَتٰىهُمُ الْعَذَابُ مِنْ حَيْثُ لَا يَشْعُرُونَ ﴿٢٦﴾

26. ඔවුන්ට පෙර සිටි අයද (අපගේ දූතයින්ව) ප්‍රතික්ෂේප කළහ. එබැවින් ඔවුන් නොදැනුවත්ව සිටිය විටදී ඔවුන් වෙතට දඬුවම පැමිණියේය.

فَأَذَاقَهُمُ اللّٰهُ الْخِزْيَ فِي الْحَيٰوةِ الدُّنْيَا ۚ وَلَعَذَابُ الْآخِرَةِ أَكْبَرُ ۘ لَوْ كَانُوا يَعْلَمُونَ ﴿٢٧﴾

27. එබැවින් අල්ලාහ් ඔවුන්ට මෙලොව ජීවිතයෙහි අවමානය විඳින්නට සැලැස්වූයේය. තවද පරලොවේ දඬුවම නිශ්චිතවම වඩා දරුණු වන්නේය, ඔවුන් දැන සිටියා නම්!

وَلَقَدْ ضَرَبْنَا لِلنَّاسِ فِي هٰذَا الْقُرْاٰنِ مِنْ كُلِّ مَثَلٍ لَعَلَّهُمْ يَتَذَكَّرُونَ ﴿٢٨﴾

28. තවද ඇත්තෙන්ම අපි මිනිසුනට ඔවුන් දැනමුතුකම් ලබනු පිණිස සියළු ආකාරයේ උපමාවන් මෙම කුර්ආනයෙහි ගෙනහැර දක්වා ඇත්තෙමු.

قُرْاٰنًا عَرَبِيًّا غَيْرَ ذِي عِوَجٍ لَعَلَّهُمْ يَتَّقُونَ ﴿٢٩﴾

29. ඔවුන් බිය බැතිමත් වනු පිණිස (අපි) මෙම කුර්ආනය ඉතා පැහැදිලිව (අරාබි බසින්) කිසිදු ඇදයක් නොමැතිව (අනාවරණය කර ඇත්තෙමු).

ضَرَبَ اللّٰهُ مَثَلًا رَجُلًا فِيهِ شُرَكَآءُ مُتَشٰكِسُونَ وَرَجُلًا سَلَمًا لِرَجُلٍ ۖ هَلْ يَسْتَوِيٰنِ مَثَلًا ۚ الْحَمْدُ لِلّٰهِ ۚ بَلْ أَكْثَرُهُمْ لَا يَعْلَمُونَ ﴿٣٠﴾

30. අල්ලාහ් උපමාවක් ගෙන හැර දක්වන්නේය. එකිනෙකාට විරුද්ධ හවුල්කරුවන් බොහොමයක් අයත් මිනිසෙක්ද එමෙන්ම එකම මිනිසෙකුට අයත් මිනිසෙක්ද වන්නේය. ඔවුන් දෙදෙනා නිදසුනින් සමානද? සියළු ප්‍රසංශා අල්ලාහ්ට හිමිවේ. නමුත් ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් නොදන්නෝය.

إِنَّكَ مَيِّتٌ وَإِنَّهُمْ مَيِّتُونَ ﴿٣١﴾

31. නියතවශයෙන්ම ඔබ මරණයට පත්වන්නෙකි'ය. තවද නියතවශයෙන්ම ඔවුන් මරණයට පත්වන්නන්ය.

ثُمَّ اِنَّكُمۡ يَوۡمَ الۡقِيٰمَةِ عِنۡدَ رَبِّكُمۡ تَخۡتَصِمُوۡنَ ﴿۳۱﴾

32. පසුව නියතවශයෙන්ම පුනරුත්ථාන දිනයේදී නුඹලාගේ අධිපතියාණන් ඉදිරියෙහි නුඹලා එකිනෙකා සමග වාද කරන්නෙහුය.

فَمَنۡ اَظۡلَمُ مِمَّنۡ كَذَبَ عَلَى اللّٰهِ وَكَذَّبَ بِالصِّدۡقِ اِذۡ جَآءَهٗ ؕ اَلَيۡسَ فِىۡ جَهَنَّمَ مَثۡوًى لِّلۡكٰفِرِيۡنَ ﴿۳۲﴾

33. එසේ නම් අල්ලාහ්ට එරෙහිව බොරු පවසන්නාට හෝ තමා වෙතට සත්‍ය පැමිණි විට එය ප්‍රතික්ෂේප කරන්නාට හෝ වඩා අදමිටුවන්නේ කවරෙක්ද? අවිශ්වාසිතයින්හට නිරයේ වාසස්ථානයක් නොවන්නේද?

24-කොටස

وَالَّذِىۡ جَآءَ بِالصِّدۡقِ وَصَدَّقَ بِهٖۤ اُولٰٓـئِكَ هُمُ الۡمُتَّقُوۡنَ ﴿۳۳﴾

34. නමුත් සත්‍යය ගෙන ආ අයද තවද එය සත්‍යය යැයි තහවුරු කරන අයද වන ඔවුන්ම බිය බැතිමතුන් වෙති.

لَهُمۡ مَّا يَشَآءُوۡنَ عِنۡدَ رَبِّهِمۡ ؕ ذٰ لِكَ جَزٰٓؤُا الۡمُحۡسِنِيۡنَ ۚ ﴿۳۴﴾

35. ඔවුන් කැමති වන සියළු දේ ඔවුන්ගේ අධිපතියාණන් වෙතින් ඔවුන්ට ලැබෙනු ඇත. යහපත් ක්‍රියා කරන්නන්හට තිළිණය එය වේ.

لِيُكَفِّرَ اللّٰهُ عَنۡهُمۡ اَسۡوَاَ الَّذِىۡ عَمِلُوۡا وَيَجۡزِيَهُمۡ اَجۡرَهُمۡ بِاَحۡسَنِ الَّذِىۡ كَانُوۡا يَعۡمَلُوۡنَ ﴿۳۵﴾

36. එබැවින් අල්ලාහ් ඔවුන් කළ දෙයෙහි නපුරු (ප්‍රතිවිපාකයන්) ඔවුන්ගෙන් ඉවත් කර එමෙන්ම ඔවුන්ගේ විශිෂ්ඨ ක්‍රියාවන් අනුව ඔවුන්ගේ තිළිණය ඔවුන්ට ලබා දෙනු පිණිසය.

اَلَيۡسَ اللّٰهُ بِكَافٍ عَبۡدَهٗ ؕ وَيُخَوِّفُوۡنَكَ بِالَّذِيۡنَ مِنۡ دُوۡنِهٖ ؕ وَمَنۡ يُّضۡلِلِ اللّٰهُ فَمَا لَهٗ مِنۡ هَادٍ ۚ ﴿۳۶﴾

37. අල්ලාහ් තම දාසයාට ප්‍රමාණවත් නොවන්නේද? එසේ වුවද ඔවුන් ඔහු හැර අන් අය ලවා ඔබව බියගන්වන්නෝය. තවද අල්ලාහ් යමෙකුව නොමග යැවීමට ඉඩ හරින්නේද ඔහුට කිසිදු මගපෙන්වන්නෙකු නොවන්නේය.

وَمَنۡ يَّهۡدِ اللّٰهُ فَمَا لَهٗ مِنۡ مُّضِلٍّ ؕ اَلَيۡسَ اللّٰهُ بِعَزِيۡزٍ ذِى انۡتِقَامٍ ﴿۳۷﴾

38. තවද අල්ලාහ් යමෙකුට මග පෙන්වන්නේද ඔහුව නොමගට යවන්නා කිසිවෙකුත් නොමැත. අල්ලාහ් බලසම්පන්න මෙන්ම දඬුවම් දීමට බලය ඇත්තා නොවන්නේද?

39. එමෙන්ම, ඔබ ඔවුන්ගෙන් 'අහස් සහ පොළොව මවා ඇත්තේ කවුරුන්ද,?'යි ඇසුවහොත් නියත වශයෙන්ම ඔවුන්, 'අල්ලාහ්ය'යි කියනු ඇත. පවසන්න, 'නුඹලා කුමක් සිතන්නෙහුද? අල්ලාහ් මා හට හානියක් කිරීමට අදහස් කළේ නම්, අල්ලාහ් හැර නුඹලා කුමන දේ කැඳවන්නේද, ඒවාට ඔහු සිදුකළ හානිය ඉවත් කළ හැකිද? නැතහොත් ඔහු මා හට දයාව දැක්වීමට අභිමත කළේ නම්, ඔවුන්ට ඔහුගේ දයාව වළක්වන්නට හැකිද?' පවසන්න, 'අල්ලාහ් මාහට ප්‍රමාණවත්ය. විශ්වාස තබන්නන් ඔහු කෙරෙහිම විශ්වාස තැබිය යුතුය'.

وَلَئِن سَأَلْتَهُم مَّنْ خَلَقَ السَّمٰوٰتِ وَالْأَرْضَ لَيَقُولُنَّ اللّٰهُ ۚ قُلْ أَفَرَءَيْتُم مَّا تَدْعُونَ مِن دُونِ اللّٰهِ إِنْ أَرَادَنِيَ اللّٰهُ بِضُرٍّ هَلْ هُنَّ كٰشِفٰتُ ضُرِّهِۦٓ أَوْ أَرَادَنِى بِرَحْمَةٍ هَلْ هُنَّ مُمْسِكٰتُ رَحْمَتِهِۦ ۚ قُلْ حَسْبِىَ اللّٰهُ ۖ عَلَيْهِ يَتَوَكَّلُ الْمُتَوَكِّلُونَ ﴿٣٩﴾

40. පවසන්න, 'එම්බල මාගේ ජනතාවනි! නුඹලාට (හැකි උපරිමයෙන්) ක්‍රියා කරනු. මාද ක්‍රියා කරන්නෙමි. නුඹලා ඉක්මනින්ම දැනගන්නෙහුය'.

قُلْ يٰقَوْمِ اعْمَلُوا عَلٰى مَكَانَتِكُمْ إِنِّى عٰمِلٌ ۖ فَسَوْفَ تَعْلَمُونَ ﴿٤٠﴾

41. (එමෙන්ම) 'කවරෙකුට දඬුවමක් පැමිණ එය ඔහුව අවමන් කරන්නේ යැයිද එමෙන්ම කවුරුන් මත ස්ථිර දඬුවමක් පහළ වන්නේ යැයිද'

مَن يَأْتِيهِ عَذَابٌ يُخْزِيهِ وَيَحِلُّ عَلَيْهِ عَذَابٌ مُّقِيمٌ ﴿٤١﴾

42. සැබැවින්ම මිනිස් වර්ගයා(ගේ යහපත) උදෙසා අපි ඔබ හට සත්‍ය සමගින් මෙම ග්‍රන්ථය පහළ කර ඇත්තෙමු. එබැවින් කවරෙක් හෝ යහමග අනුගමනය කරන්නේද එය තම ආත්මයේ යහපත උදෙසාය. එමෙන්ම කවරෙක් හෝ නොමග යන්නේද එය තමාට එරෙහිව නොමග යැමක්ය. තවද ඔබ ඔවුන් කෙරෙහි වගකිවයුත්තෙකු නොවේ.

إِنَّآ أَنزَلْنَا عَلَيْكَ الْكِتٰبَ لِلنَّاسِ بِالْحَقِّ ۖ فَمَنِ اهْتَدٰى فَلِنَفْسِهِۦ ۖ وَمَن ضَلَّ فَإِنَّمَا يَضِلُّ عَلَيْهَا ۖ وَمَآ أَنتَ عَلَيْهِم بِوَكِيلٍ ﴿٤٢﴾

43. අල්ලාහ් ජීවත්ව සිටින්නන්ගේ ආත්මයන් ඔවුන්ගේ මරණ මොහොතේදීද එමෙන්ම (තවමත්) මරණයට පත් නොවූ අයගේ (ආත්මයන්) නින්දෙන් පසුවන අවස්ථාවේදීද අත්පත් කර ගන්නේය. පසුව ඔහු මරණය තීන්දු කර ඇති අයගේ (ආත්මයන්) ඔහු රඳවා

اللّٰهُ يَتَوَفَّى الْأَنفُسَ حِينَ مَوْتِهَا وَالَّتِى لَمْ تَمُتْ فِى مَنَامِهَا ۖ فَيُمْسِكُ الَّتِى قَضٰى عَلَيْهَا الْمَوْتَ وَيُرْسِلُ الْأُخْرٰىٓ

إِلَىٰٓ أَجَلٍ مُّسَمًّى ۚ إِنَّ فِى ذَٰلِكَ لَءَايَٰتٍ لِّقَوْمٍ يَتَفَكَّرُونَ ﴿٤٣﴾

තබන්නේය. තවද අනෙක් ඒවා නියමිත කාල පරිච්ඡේදය දක්වා (ආපසු) යවන්නේය. නියතවශයෙන්ම මෙනෙහි කරන ජනතාවට එහිලා සළකුණු ඇත.

أَمِ ٱتَّخَذُوا۟ مِن دُونِ ٱللَّهِ شُفَعَآءَ ۚ قُلْ أَوَلَوْ كَانُوا۟ لَا يَمْلِكُونَ شَيْـًٔا وَلَا يَعْقِلُونَ ﴿٤٤﴾

44. ඔවුන් අල්ලාහ් හැර (ව්‍යාජ දෙවිවරුන්), මැදිහත්වන්නන් (ලෙස) ගත්තේද? පවසන්න, '(ව්‍යාජ දෙවිවරුන් වන) ඔවුන් කිසිම බලයක් නොමැතිවද දැනුමක් නොමැතිව සිටියදීද?'

قُل لِّلَّهِ ٱلشَّفَٰعَةُ جَمِيعًا ۖ لَّهُۥ مُلْكُ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ ۖ ثُمَّ إِلَيْهِ تُرْجَعُونَ ﴿٤٥﴾

45. පවසන්න, 'සියළු මැදිහත්වීම් අල්ලාහ් වෙතය. අහස් සහ පොළොවේ රාජ්‍යය ඔහුට අයත්ය. පසුව ඔහු වෙතටම නුඹලා ආපසු ගෙන එනු ලබන්නෙහුය'.

وَإِذَا ذُكِرَ ٱللَّهُ وَحْدَهُ ٱشْمَأَزَّتْ قُلُوبُ ٱلَّذِينَ لَا يُؤْمِنُونَ بِٱلْءَاخِرَةِ ۖ وَإِذَا ذُكِرَ ٱلَّذِينَ مِن دُونِهِۦٓ إِذَا هُمْ يَسْتَبْشِرُونَ ﴿٤٦﴾

46. තවද එකම අල්ලාහ්ව පමණක් සඳහන් කරනු ලබන විට පරලොව කෙරෙහි විශ්වාස නොකරන අයගේ හදවත් පිළිකුලෙන් හැකිළෙයි. නමුත් ඔහු හැර අන් අයව සඳහන් කරනු ලබන එසැනින්ම ඔවුන් ප්‍රීතියෙන් කුල්මත් වෙති.

قُلِ ٱللَّهُمَّ فَاطِرَ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ عَٰلِمَ ٱلْغَيْبِ وَٱلشَّهَٰدَةِ أَنتَ تَحْكُمُ بَيْنَ عِبَادِكَ فِى مَا كَانُوا۟ فِيهِ يَخْتَلِفُونَ ﴿٤٧﴾

47. පවසන්න, 'ඕ අල්ලාහ්! අහස් සහ පොළොවේ උත්පාදකයාණෙනි! අදෘෂ්‍යමාන දේ මෙන්ම දෘෂ්‍යමාන දේ දත්තාණෙනි! ඔබගේ දාසයින් අතර මත භේද ඇති කරමින් සිටි දේ පිළිබඳව විනිශ්චය කරන්නේ ඔබමය'.

وَلَوْ أَنَّ لِلَّذِينَ ظَلَمُوا۟ مَا فِى ٱلْأَرْضِ جَمِيعًا وَمِثْلَهُۥ مَعَهُۥ لَٱفْتَدَوْا۟ بِهِۦ مِن سُوٓءِ ٱلْعَذَابِ يَوْمَ ٱلْقِيَٰمَةِ ۚ وَبَدَا لَهُم مِّنَ ٱللَّهِ مَا لَمْ يَكُونُوا۟ يَحْتَسِبُونَ ﴿٤٨﴾

48. තවද වරදකරුවන් සතුව පොළොවෙහි ඇති සියළු දේද එයට අමතරව ඒ සමග එවැන්නක් මෙන්ම තවත් දේද තිබුණි නම් පුනරුත්ථාන දිනයේදී නපුරු දඬුවමින් (බේරීම සඳහා) තමන් වෙනුවෙන් වන්දි වශයෙන් ගෙවීමට නියතවශයෙන්ම ඔවුන් (තැත්) කරනු ඇත. නමුත් ඔවුන් කිසිවිටෙකත් නොසිතූ දෙයක් අල්ලාහ් වෙතින් ඔවුන් හමුවේ දිස්වනු ඇත.

49. තවද ඔවුන් ඉපැයූ දෑයෙහි නපුරු (ප්‍රතිවිපාකයන්) ඔවුන්ට පැහැදිලිව පෙනෙන්නට තිබෙන්නේය. තවද ඔවුන් සරදම් කරමින් සිටි දේම ඔවුන්ව වටලන්නේය.

وَبَدَا لَهُمْ سَيِّئَاتُ مَا كَسَبُوا وَحَاقَ بِهِم مَّا كَانُوا بِهِ يَسْتَهْزِئُونَ ﴿٤٩﴾

50. තවද මිනිසාට හිරිහැරයක් අත්වූ විට ඔහු අපට හඬ ගසන්නේය. නමුත් අපි ඔහුට අප වෙතින් අනුග්‍රහයක් පිරිනමන විට ඔහු 'මෙය (මාගේම) දැනුම හේතුවෙන් මා හට දෙනු ලැබුවකි'යි කියන්නේය. නොඑසේය එය පිරික්සුමක් පමණි. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදනිති.

فَإِذَا مَسَّ الْإِنسَانَ ضُرٌّ دَعَانَا ثُمَّ إِذَا خَوَّلْنَاهُ نِعْمَةً مِّنَّا قَالَ إِنَّمَا أُوتِيتُهُ عَلَىٰ عِلْمٍ ۚ بَلْ هِيَ فِتْنَةٌ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿٥٠﴾

51. මොවුන්ට පෙර සිටි අයද මෙවන් දෙයම පැවසූහ. එහෙත් ඔවුන් ඉපැයූ සියල්ලම ඔවුන්ට ඵලක් වූයේ නැත.

قَدْ قَالَهَا الَّذِينَ مِن قَبْلِهِمْ فَمَا أَغْنَىٰ عَنْهُم مَّا كَانُوا يَكْسِبُونَ ﴿٥١﴾

52. එබැවින් ඔවුන් ඉපැයූ දෑයෙහි නපුරු (ප්‍රතිවිපාකයන්) ඔවුන්ට අත් විය. එමෙන්ම (අවිශ්වාසිත) මොවුන් අතුරින් වැරදිකරන අයද ගත්කළ මොවුන් ඉපැයූ දෑයෙහි නපුරු (ප්‍රතිවිපාකයන්) මොවුන්ටද අත්වනු ඇත. මොවුන්ට මිදී යෑමටද නොහැක.

فَأَصَابَهُمْ سَيِّئَاتُ مَا كَسَبُوا ۚ وَالَّذِينَ ظَلَمُوا مِنْ هَٰؤُلَاءِ سَيُصِيبُهُمْ سَيِّئَاتُ مَا كَسَبُوا ۙ وَمَا هُم بِمُعْجِزِينَ ﴿٥٢﴾

53. අල්ලාහ් ඔහු අභිමත කෙනෙකුට ජීවනෝපාය බහුලව දෙන බවත් එමෙන්ම (ඔහු අභිමත කෙනෙකුට එය) අඩුකර දෙන බවත් ඔවුන් නොදන්නේද? සැබැවින්ම විශ්වාස කරන ජනතාවට එහිලා සළකුණු ඇත.

أَوَلَمْ يَعْلَمُوا أَنَّ اللَّهَ يَبْسُطُ الرِّزْقَ لِمَن يَشَاءُ وَيَقْدِرُ ۚ إِنَّ فِي ذَٰلِكَ لَآيَاتٍ لِّقَوْمٍ يُؤْمِنُونَ ﴿٥٣﴾

54. පවසන්න, "තමන්ගේම ආත්මයන් කෙරෙහි වරදකරගත් එම්බල මාගේ දාසයිනි! අල්ලාහ්ගේ දයාව ගැන අපේක්ෂිත නොවත්වා. නියතවශයෙන්ම අල්ලාහ් සියළු පව් ක්ෂමා කරන්නේය. සැබැවින්ම ඔහුම අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය".

قُلْ يَا عِبَادِيَ الَّذِينَ أَسْرَفُوا عَلَىٰ أَنفُسِهِمْ لَا تَقْنَطُوا مِن رَّحْمَةِ اللَّهِ ۚ إِنَّ اللَّهَ يَغْفِرُ الذُّنُوبَ جَمِيعًا ۚ إِنَّهُ هُوَ الْغَفُورُ الرَّحِيمُ ﴿٥٤﴾

وَاَنِيْبُوْٓا اِلٰى رَبِّكُمْ وَاَسْلِمُوْا لَهٗ مِنْ قَبْلِ اَنْ يَّاْتِيَكُمُ الْعَذَابُ ثُمَّ لَا تُنْصَرُوْنَ ﴿٥٥﴾

55. "තවද නුඹලා තමන්ගේ අධිපතියාණන් වෙතට හැරෙනු. එමෙන්ම නුඹලා වෙත දඬුවම පැමිණීමට පෙර නුඹලා ඔහුට යටහත් වනු. (මන්ද) පසුව නුඹලා උදව් නොකරනු ලබන්නෙහුය".

وَاتَّبِعُوْٓا اَحْسَنَ مَآ اُنْزِلَ اِلَيْكُمْ مِّنْ رَّبِّكُمْ مِّنْ قَبْلِ اَنْ يَّاْتِيَكُمُ الْعَذَابُ بَغْتَةً وَّاَنْتُمْ لَا تَشْعُرُوْنَ ﴿٥٦﴾

56. "තවද නුඹලා නොදැන සිටියදී එසැනින්ම නුඹලා මත දඬුවම පැමිණීමට පෙර, නුඹලාගේ අධිපතියාණන් වෙතින් නුඹලාට පහළ කර ඇති විශිෂ්ඨ (ඉගැන්වීම) අනුගමනය කරනු".

اَنْ تَقُوْلَ نَفْسٌ يّٰحَسْرَتٰى عَلٰى مَا فَرَّطْتُّ فِيْ جَنْۢبِ اللّٰهِ وَاِنْ كُنْتُ لَمِنَ السّٰخِرِيْنَ ﴿٥٧﴾

57. "කිසිවෙක්, 'අහෝ මා හට වූ දුකකි! අල්ලාහ් සම්බන්ධව (කාර්යයන් ඉටු කිරීමෙහිදී) මා නොසැළකිලිමත්ව සිටියෙමි. තවද මා නියතවශයෙන්ම සරදම් කරන්නවුන්ගෙන් වූයෙමි'යි නොකියනු පිණිසය".

اَوْ تَقُوْلَ لَوْ اَنَّ اللّٰهَ هَدٰىنِيْ لَكُنْتُ مِنَ الْمُتَّقِيْنَ ﴿٥٨﴾

58. "නැතහොත් 'අල්ලාහ් මාහට මග පෙන්වූයේ නම්, නිශ්චිතවම මා බිය බැතිමතුන් අතර වන්නට තිබුණි'යි නොකියනු පිණිසය".

اَوْ تَقُوْلَ حِيْنَ تَرَى الْعَذَابَ لَوْ اَنَّ لِيْ كَرَّةً فَاَكُوْنَ مِنَ الْمُحْسِنِيْنَ ﴿٥٩﴾

59. "නැතහොත් එම දඬුවම දකින විට, 'මා හට (ලොව වෙතට) ආපසු යැමට අවස්ථාවක් ඇතොත් මා යහපත් ක්‍රියා කරන්නවුන් අතර වන්නට තිබුණි!'යි නොකියනු පිණිසත්ය".

بَلٰى قَدْ جَآءَتْكَ اٰيٰتِيْ فَكَذَّبْتَ بِهَا وَاسْتَكْبَرْتَ وَكُنْتَ مِنَ الْكٰفِرِيْنَ ﴿٦٠﴾

60. (එයට දෙවියන්) 'නොඑසේය, මාගේ සළකුණු නුඹ වෙත පැමිණියේය. නමුත් නුඹ ඒවා බොරු ලෙස සැළකුවෙහිය. තවද නුඹ උඩඟු වී නුඹ අවිශ්වාසිතයින්ගෙන් වුවෙහියැ'(යි පිළිතුරු දෙන්නේය).

وَيَوْمَ الْقِيٰمَةِ تَرَى الَّذِيْنَ كَذَبُوْا عَلَى اللّٰهِ وُجُوْهُهُمْ مُّسْوَدَّةٌ ۭ اَلَيْسَ فِيْ جَهَنَّمَ مَثْوًى لِّلْمُتَكَبِّرِيْنَ ﴿٦١﴾

61. තවද පුනරුත්ථාන දිනයේදී අල්ලාහ්ට එරෙහිව බොරු කළ අයගේ මුහුණු කළුවන් වී තිබෙනු ඔබ දකිනු ඇත. අහංකාර වන්නන්හට වාසස්ථානයක් නිරයෙහි නොවන්නේද?

62. අල්ලාහ්, බිය බැතිමත් වන අයව, ඔවුන්ගේ සාර්ථකත්වය හේතු කොටගෙන මුදවා ගන්නේය. නපුර ඔවුන්ව හසු නොකරයි. තවද ඔවුන් ශෝක වන්නේ නැත.

وَيُنَجِّي اللَّهُ الَّذِينَ اتَّقَوْا بِمَفَازَتِهِمْ لَا يَمَسُّهُمُ السُّوءُ وَلَا هُمْ يَحْزَنُونَ ﴿٦٢﴾

63. අල්ලාහ් සියළු දෙයෙහි මැවුම්කරුවාය. තවද ඔහු සියළු දේ කෙරෙහි සුපරීක්ෂකයාය.

اللَّهُ خَالِقُ كُلِّ شَيْءٍ وَهُوَ عَلَىٰ كُلِّ شَيْءٍ وَكِيلٌ ﴿٦٣﴾

64. අහස් සහ පොළොවේ යතුරු අයත් වන්නේ ඔහුටමය. තවද අල්ලාහ්ගේ සළකුණු කෙරෙහි අවිශ්වාස කළ අය ගත්කළ පාඩු විඳින්නන් වන්නේ මොවුන්මය.

لَهُ مَقَالِيدُ السَّمَاوَاتِ وَالْأَرْضِ وَالَّذِينَ كَفَرُوا بِآيَاتِ اللَّهِ أُولَٰئِكَ هُمُ الْخَاسِرُونَ ﴿٦٤﴾

65. පවසන්න, 'මා අල්ලාහ් හැර අන් අයව වඳින්නට නුඹලා මාහට අණ කරන්නෙහු ද? එම්බල අඥානයිනි!'

قُلْ أَفَغَيْرَ اللَّهِ تَأْمُرُونِّي أَعْبُدُ أَيُّهَا الْجَاهِلُونَ ﴿٦٥﴾

66. තවද සැබැවින්ම ඔබ වෙතද ඔබට පෙර සිටි අය වෙතද (මෙසේ) අනාවරණය කර ඇත. 'ඔබ (දෙවියන්ට) සමානයන් තැබුවේ නම්, ඔබගේ ක්‍රියාව නියතවශයෙන්ම නිෂ්ඵල වනු ඇත. තවද ඔබ නියතවශයෙන්ම පාඩුවිඳින්නන්ගෙන් වනු ඇත'.

وَلَقَدْ أُوحِيَ إِلَيْكَ وَإِلَى الَّذِينَ مِنْ قَبْلِكَ لَئِنْ أَشْرَكْتَ لَيَحْبَطَنَّ عَمَلُكَ وَلَتَكُونَنَّ مِنَ الْخَاسِرِينَ ﴿٦٦﴾

67. නොඑසේය, අල්ලාහ්ට නමදින්න. තවද කෘතඥවන්නන් අතරින් වන්න.

بَلِ اللَّهَ فَاعْبُدْ وَكُنْ مِنَ الشَّاكِرِينَ ﴿٦٧﴾

68. අල්ලාහ්ගේ තේජසයට ගරු කළ යුතු පරිදි ඔවුන් ගරු කළේ නැත. තවද පුනරුත්ථාන දිනයේදී පොළොව මුළුමනින්ම ඔහුගේ ග්‍රහණයෙහි වනු ඇත. එසේම අහස්ද ඔහුගේ දකුණතින් හකුළුවනු ලබන්නේය. ඔහු සුවිශුද්ධය. තවද ඔවුන් (ඔහුට) සමාන තබන දේට වඩා ඔහු අති උසස්ය.

وَمَا قَدَرُوا اللَّهَ حَقَّ قَدْرِهِ وَالْأَرْضُ جَمِيعًا قَبْضَتُهُ يَوْمَ الْقِيَامَةِ وَالسَّمَاوَاتُ مَطْوِيَّاتٌ بِيَمِينِهِ سُبْحَانَهُ وَتَعَالَىٰ عَمَّا يُشْرِكُونَ ﴿٦٨﴾

وَنُفِخَ فِي الصُّورِ فَصَعِقَ مَنْ فِي السَّمَاوَاتِ وَمَنْ فِي الْأَرْضِ إِلَّا مَنْ شَاءَ اللَّهُ ۖ ثُمَّ نُفِخَ فِيهِ أُخْرَىٰ فَإِذَا هُمْ قِيَامٌ يَنْظُرُونَ ﴿٦٩﴾

69. තවද සූර් (නලාව) පිඹිනු ලබන්නේය. තවද අල්ලාහ් (මුදා හැරීමට) අභිමත කළ අය හැරෙන්නට අහස්හි ඇති (සියළු) අයද පොළොවෙහි ඇති (සියළු) අයද සිහිසුන්ව(වැටෙ)න්නෝය. පසුව දෙවන වතාවටද එය පිඹිනු ලබන්නේය. පසුව එසැනින්ම ඔවුන් නැගිට බලා සිටින්නෝය.

وَأَشْرَقَتِ الْأَرْضُ بِنُورِ رَبِّهَا وَوُضِعَ الْكِتَابُ وَجِيءَ بِالنَّبِيِّينَ وَالشُّهَدَاءِ وَقُضِيَ بَيْنَهُمْ بِالْحَقِّ وَهُمْ لَا يُظْلَمُونَ ﴿٧٠﴾

70. තවද පොළොව එයගේ අධිපතියාණන්ගේ ආලෝකය මගින් බැබළෙනු ඇත. තවද (ක්‍රියාවන් හි වාර්තා) පොත (ඔවුන් ඉදිරියෙහි විවෘතව) තබනු ඇත. තවද වක්තෘවරුන්ද සාක්ෂිකරුවන්ද ගෙන එනු ලබන්නෝය. තවද ඔවුනතර යුක්තිය සමග විනිශ්චය දෙනු ලබන්නේය. තවද ඔවුන් අසාධාරණ නොකරනු ලබන්නෝය.

وَوُفِّيَتْ كُلُّ نَفْسٍ مَا عَمِلَتْ وَهُوَ أَعْلَمُ بِمَا يَفْعَلُونَ ﴿٧١﴾

71. තවද සෑම ආත්මයකටම එය කළ දේ වෙනුවෙන් තිළිණය සම්පූර්ණයෙන්ම දෙනු ලබන්නේය. තවද ඔවුන් කරන දේ ගැන ඔහු මැනැවින් දන්නේය.

وَسِيقَ الَّذِينَ كَفَرُوا إِلَىٰ جَهَنَّمَ زُمَرًا ۖ حَتَّىٰ إِذَا جَاءُوهَا فُتِحَتْ أَبْوَابُهَا وَقَالَ لَهُمْ خَزَنَتُهَا أَلَمْ يَأْتِكُمْ رُسُلٌ مِنْكُمْ يَتْلُونَ عَلَيْكُمْ آيَاتِ رَبِّكُمْ وَيُنْذِرُونَكُمْ لِقَاءَ يَوْمِكُمْ هَٰذَا ۚ قَالُوا بَلَىٰ وَلَٰكِنْ حَقَّتْ كَلِمَةُ الْعَذَابِ عَلَى الْكَافِرِينَ ﴿٧٢﴾

72. තවද අවිශ්වාස කළ අය නිරය වෙතට රංචු වශයෙන් දක්කාගෙන යනු ලබන්නෝය. ඔවුන් එහි සමීප වන කල්හි එහි දොරටු විවෘත කරනු ලබන්නේය. තවද එහි දොරටු පාලකයින් ඔවුන් වෙත 'නුඹලාගේ අධිපතියාණන්ගේ සළකුණු නුඹලා හට පාරායනා කරමින්ද නුඹලාගේ මෙදින හමුව පිළිබඳව නුඹලාට අවවාද කරමින්ද නුඹලා අතරින්ම දූතයින් නුඹලා වෙත නොපැමිණියේදැ?'යි කියනු ඇත. (එයට) ඔවුන්, 'එසේය, නමුත් අවිශ්වාසිතයින්ට එරෙහිවූ දඬුවමේ තීන්දුව සාධාරණව ස්ථිර වූයේ යැ'යි කියනු ඇත.

قِيلَ ادْخُلُوا أَبْوَابَ جَهَنَّمَ خَالِدِينَ فِيهَا ۖ

73. 'නුඹලා එහි දිගුකල් වෙසෙන්නට නිරයේ දොරටුවලින් ඇතුළු වනු.

فَبِئْسَ مَثْوَى الْمُتَكَبِّرِينَ ﴿٧٣﴾

තවද උඩඟු වන්නන්ගේ වාසස්ථානය නපුරුයැ'යි කියනු ලබන්නේය.

وَسِيقَ الَّذِينَ اتَّقَوْا رَبَّهُمْ إِلَى الْجَنَّةِ زُمَرًا ۖ حَتَّىٰ إِذَا جَاءُوهَا وَفُتِحَتْ أَبْوَابُهَا وَقَالَ لَهُمْ خَزَنَتُهَا سَلَامٌ عَلَيْكُمْ طِبْتُمْ فَادْخُلُوهَا خَالِدِينَ ﴿٧٤﴾

74. තවද තම අධිපතියාණන් කෙරෙහි බිය බැතිමත් වූ අය කණ්ඩායම් වශයෙන් ස්වර්ගය වෙතට කැඳවාගෙන යනු ලබන්නෝය. ඔවුන් එහි සමීප වන කල්හි එහි දොරටු විවෘත කරනු ලබන්නේය. තවද එහි දොරටු පාලකයින්, ඔවුන් වෙත, 'ඔබලාහට සාමය අත් වේවා! ඔබලා සතුටු වනු. මෙහි ඔබලා සදාකල් වෙසෙන්නන් ලෙස පිවිසෙනු'යි කියනු ඇත.

وَقَالُوا الْحَمْدُ لِلَّهِ الَّذِي صَدَقَنَا وَعْدَهُ وَأَوْرَثَنَا الْأَرْضَ نَتَبَوَّأُ مِنَ الْجَنَّةِ حَيْثُ نَشَاءُ ۖ فَنِعْمَ أَجْرُ الْعَامِلِينَ ﴿٧٥﴾

75. තවද ඔවුහු, 'සියළු ප්‍රසංශා අල්ලාහ්ට අයත් වන්නේය. ඔහු තම පොරොන්දුව අප හට පරිපූර්ණ කර ඇත්තේය. තවද ඔහු අප හට අපි කැමති ඕනෑම තැනක අපගේ වාසස්ථානය උයනෙහි සාදාගන්නට මෙම භූමිය අපට උරුම කර දුන්නේයැ'යි කියනු ඇත. එසේනම් (ධාර්මිෂ්ඨව) ක්‍රියා කරන්නන්ගේ තිළිණය කෙතරම් විශිෂ්ඨ වන්නේද!

وَتَرَى الْمَلَائِكَةَ حَافِّينَ مِنْ حَوْلِ الْعَرْشِ يُسَبِّحُونَ بِحَمْدِ رَبِّهِمْ ۖ وَقُضِيَ بَيْنَهُمْ بِالْحَقِّ وَقِيلَ الْحَمْدُ لِلَّهِ رَبِّ الْعَالَمِينَ ﴿٧٦﴾

76. තවද සුරදූතයින්ව ඔවුන්ගේ අධිපතියාණන්ට (ඔහුගේ) ප්‍රසංශාව සමග සුවිශුද්ධ කරමින් සිහසුන වටා සැරිසරනු ඔබ දකිනු ඇත. තවද ඔවුන් අතර යුක්තිසහගතව විනිශ්චය කරනු ලබන්නේය. තවද 'සර්ව ලෝකයන්ට අධිපතියාණන් වන අල්ලාහ්ට සියළු ප්‍රසංශා අයත් වන්නේයැ'යි කියනු ලබන්නේය.




අල් මු:මින්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ②

2. හා, මීම්.◆

تَنْزِيْلُ الْكِتٰبِ مِنَ اللّٰهِ الْعَزِيْزِ الْعَلِيْمِ ③

3. මෙම ග්‍රන්ථයේ පහළ වීම බලසම්පන්නවූද සියල්ල දන්නා වූද අල්ලාහ්ගෙන්ය.

غَافِرِ الذَّنْۢبِ وَقَابِلِ التَّوْبِ شَدِيْدِ الْعِقَابِ ذِى الطَّوْلِ لَآ اِلٰهَ اِلَّا هُوَ اِلَيْهِ الْمَصِيْرُ ④

4. පව් ක්ෂමාකරන්නාය, පසුතැවිලිවීම් භාරගන්නාය, දඬුවම් දීමෙහි ඉතා දැඩිය, වරප්‍රසාද හිමිය, ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නැත. ආපසු යෑම ඔහු වෙතටමය.

مَا يُجَادِلُ فِيْٓ اٰيٰتِ اللّٰهِ اِلَّا الَّذِيْنَ كَفَرُوْا فَلَا يَغْرُرْكَ تَقَلُّبُهُمْ فِى الْبِلَادِ ⑤

5. අවිශ්වාසිත අය හැර අන් කිසිවෙක් අල්ලාහ්ගේ සළකුණු පිළිබඳව තර්ක නොකරති. එබැවින් දේශයන්හි ඔවුන් සැරිසැරීම ඔබව මුලා නොකරත්වා.

كَذَّبَتْ قَبْلَهُمْ قَوْمُ نُوْحٍ وَّالْاَحْزَابُ مِنْۢ بَعْدِهِمْ وَهَمَّتْ كُلُّ اُمَّةٍۢ بِرَسُوْلِهِمْ لِيَاْخُذُوْهُ وَجٰدَلُوْا بِالْبَاطِلِ لِيُدْحِضُوْا بِهِ الْحَقَّ فَاَخَذْتُهُمْ فَكَيْفَ كَانَ عِقَابِ ⑥

6. මොවුන්ට පෙර නූහ්ගේ ජනතාවද ඔවුන්ට පසු අන් පිරිස්ද (අපගේ සළකුණු) ප්‍රතික්ෂේප කළහ. තවද සෑම සමූහයක්ම ඔවුන්ගේ දූතයින්ව හසුකරගන්නට තැත් කළහ. තවද ව්‍යාජ (විවාදයන්) මගින් සත්‍යය බිඳහැළීමට ඔවුන් එමගින් තර්ක කළහ. එහෙයින් මම ඔවුන්ව හසු කරගත්තෙමි. තවද මාගේ දඬුවම කෙතරම් දරුණු වූයේද!

وَكَذٰلِكَ حَقَّتْ كَلِمَتُ رَبِّكَ عَلَى الَّذِيْنَ كَفَرُوْٓا اَنَّهُمْ اَصْحٰبُ النَّارِ ⑦

7. ඔබගේ අධිපතියාණන්ගේ වචනය අවිශ්වාසිතයින්ට එරෙහිව සත්‍ය බවට තහවුරු වූයේ මෙලෙසය. එනම් එය ඔවුන් ගින්නෙහි සහකරුවන් වන බවයි.

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

ٱلَّذِينَ يَحۡمِلُونَ ٱلۡعَرۡشَ وَمَنۡ حَوۡلَهُۥ يُسَبِّحُونَ بِحَمۡدِ رَبِّهِمۡ وَيُؤۡمِنُونَ بِهِۦ وَيَسۡتَغۡفِرُونَ لِلَّذِينَ ءَامَنُواْۖ رَبَّنَا وَسِعۡتَ كُلَّ شَيۡءٖ رَّحۡمَةٗ وَعِلۡمٗا فَٱغۡفِرۡ لِلَّذِينَ تَابُواْ وَٱتَّبَعُواْ سَبِيلَكَ وَقِهِمۡ عَذَابَ ٱلۡجَحِيمِ ٨

8. සිහසුන උසුලාගෙන සිටින අයද එහි අවට සිටින අයද තමන්ගේ අධිපතියාණන්ගේ ප්‍රශංසාව සමග (ඔහුව) සුවිශුද්ධ කරති. තවද ඔහු කෙරෙහි විශ්වාස කරති. තවද ඔවුහු විශ්වාසිත අය වෙනුවෙන් (මෙසේ පවසමින්) ක්ෂමාව අයැදිති. 'අපගේ අධිපතියාණෙනි! ඔබ (තම) දයාවෙන් සහ දැනුමෙන් සියල්ල වෙළාගෙන ඇත. එබැවින් පසුතැවිලි වී ඔබගේ මාර්ගය අනුගමනය කරන අයට ක්ෂමාව දෙනු මැනව. තවද ඔවුන්ව නිරයේ දඬුවමින් ආරක්ෂා කරනු මැනව'.

رَبَّنَا وَأَدۡخِلۡهُمۡ جَنَّٰتِ عَدۡنٍ ٱلَّتِي وَعَدتَّهُمۡ وَمَن صَلَحَ مِنۡ ءَابَآئِهِمۡ وَأَزۡوَٰجِهِمۡ وَذُرِّيَّٰتِهِمۡۚ إِنَّكَ أَنتَ ٱلۡعَزِيزُ ٱلۡحَكِيمُ ٩

9. 'අපගේ අධිපතියාණෙනි! ඔබ ඔවුන්ට පොරොන්දු වූ සදාකාලික උද්‍යානයන්හි ඔවුන්වද ඔවුන්ගේ පියවරුන් ඔවුන්ගේ භාර්යාවන් සහ ඔවුන්ගේ දරුවන් යන අය අතුරින් දැහැමියන්වද ඇතුළු කරනු මැනව. නියතවශයෙන්ම ඔබ බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය'.

وَقِهِمُ ٱلسَّيِّـَٔاتِۚ وَمَن تَقِ ٱلسَّيِّـَٔاتِ يَوۡمَئِذٖ فَقَدۡ رَحِمۡتَهُۥۚ وَذَٰلِكَ هُوَ ٱلۡفَوۡزُ ٱلۡعَظِيمُ ١٠

10. 'තවද ඔවුන්ව නපුරෙන් ආරක්ෂා කරනු මැනව. තවද ඔබ එදින කවරෙකුව නපුරෙන් ආරක්ෂා කළේද නියතවශයෙන්ම ඔබ ඔහුට දයාව දැක්වූයෙහිය. තවද මෙයම අතිමහත් ජයග්‍රහණයකි'.

إِنَّ ٱلَّذِينَ كَفَرُواْ يُنَادَوۡنَ لَمَقۡتُ ٱللَّهِ أَكۡبَرُ مِن مَّقۡتِكُمۡ أَنفُسَكُمۡ إِذۡ تُدۡعَوۡنَ إِلَى ٱلۡإِيمَٰنِ فَتَكۡفُرُونَ ١١

11. නිශ්චිතවම අවිශ්වාස කළ ඔවුන්හට (මෙසේ) කැඳවීමක් කරනු ලබන්නේය. 'නුඹලා විශ්වාසය වෙත කැඳවනු ලැබූ විට නුඹලා එය ප්‍රතික්ෂේප කළෙහුය. නුඹලා එකිනෙකා අතර ඇති පිළිකුලට වඩා අල්ලාහ්ගේ පිළිකුල ඉමහත්ය'.

قَالُواْ رَبَّنَآ أَمَتَّنَا ٱثۡنَتَيۡنِ وَأَحۡيَيۡتَنَا

12. ඔවුහු, 'අපගේ අධිපතියාණෙනි! ඔබ අපව දෙවතාවක් මරණයට පත් කර ඇත්තෙහිය. තවද ඔබ අපට

اثْنَتَيْنِ فَاعْتَرَفْنَا بِذُنُوبِنَا فَهَلْ إِلَىٰ خُرُوجٍ مِّن سَبِيلٍ ﴿١٢﴾

දෙවතාවක් ජීවය දුන්නෙහිය. තවද දැන් අපගේ පව් අපි පාපොච්චාරණය කරන්නෙමු. එසේනම්, මිදීමට මගක් ඇත්තේද,?'යි කියනු ඇත.

ذَٰلِكُم بِأَنَّهُ إِذَا دُعِيَ اللَّهُ وَحْدَهُ كَفَرْتُمْ ۖ وَإِن يُشْرَكْ بِهِ تُؤْمِنُوا ۚ فَالْحُكْمُ لِلَّهِ الْعَلِيِّ الْكَبِيرِ ﴿١٣﴾

13. එය මක්නිසාදයත් එකම අල්ලාහ් (ඔහු) යැයි ප්‍රකාශ කරනු ලැබූ විට නුඹලා (එම කැඳවීම) ප්‍රතික්ෂේප කළෙහුය. එහෙත් ඔහුට සමානයන් තබනු ලැබූ විට නුඹලා විශ්වාස කළෙහුය. නමුත් (අවසන්) තීරණය, අති උසස් වූද අති ශ්‍රේෂ්ඨ වූද අල්ලාහ්ට අයත් වන්නේය.

هُوَ الَّذِي يُرِيكُمْ آيَاتِهِ وَيُنَزِّلُ لَكُم مِّنَ السَّمَاءِ رِزْقًا ۚ وَمَا يَتَذَكَّرُ إِلَّا مَن يُنِيبُ ﴿١٤﴾

14. ඔහුගේ සළකුණු නුඹලාට පෙන්වන්නේද අහසින් නුඹලාට ජීවනෝපාය පහළ කරන්නේද ඔහුමය. නමුත් (දෙවියන් වෙතට) හැරෙන්නෙකු මිස අන්කිසිවෙක් අනුශාසනා නොලබන්නේය.

فَادْعُوا اللَّهَ مُخْلِصِينَ لَهُ الدِّينَ وَلَوْ كَرِهَ الْكَافِرُونَ ﴿١٥﴾

15. එසේනම් නුඹලා විශ්වාසයෙහි ඔහුට අවංක වෙමින් අල්ලාහ්ව කැඳවනු. අවිශ්වාසිතයින් (කෙතරම්) අකැමති වුවද.

رَفِيعُ الدَّرَجَاتِ ذُو الْعَرْشِ يُلْقِي الرُّوحَ مِنْ أَمْرِهِ عَلَىٰ مَن يَشَاءُ مِنْ عِبَادِهِ لِيُنذِرَ يَوْمَ التَّلَاقِ ﴿١٦﴾

16. අති උසස් තරාතිරම් ඇත්තාය, සිහසුනෙහි හිමියාණන්ය. ඔහු තම දාසයින්ගෙන් තමා අභිමත ඕනෑම කෙනෙකු වෙත තම විධානයෙන් ආත්මය පහළ කරන්නේය. එය ඔහු හමුවන දිනය ගැන අවවාද කරනු පිණිසය.

يَوْمَ هُم بَارِزُونَ ۖ لَا يَخْفَىٰ عَلَى اللَّهِ مِنْهُمْ شَيْءٌ ۚ لِّمَنِ الْمُلْكُ الْيَوْمَ ۖ لِلَّهِ الْوَاحِدِ الْقَهَّارِ ﴿١٧﴾

17. ඔවුන් (සියල්ලන්ම) ඉදිරියට පැමිණෙන්නාවූ දිනයේදී ඔවුන් පිළිබඳ කිසිවක් අල්ලාහ්ගෙන් සැඟවී නොතිබෙන්නේය. 'මෙදින රාජ්‍යය කවුරුන්ට අයත්ද?' එකම වූද පරම මහෝත්තම වූද අල්ලාහ්ටය.

الْيَوْمَ تُجْزَىٰ كُلُّ نَفْسٍ بِمَا كَسَبَتْ ۚ

18. 'මෙදින සියළු ආත්මයන්ට, ඒවා ඉපැයූ දේ වෙනුවෙන් ඵලවිපාක දෙනු

ලබන්නේය. මෙදින අයුක්තියක් නොමැත. නියතවශයෙන්ම අල්ලාහ් ගණන් ගැනීමෙහි ඉතා සීඝ්‍රය'.

لَا ظُلْمَ الْيَوْمَ ۚ إِنَّ اللَّهَ سَرِيعُ الْحِسَابِ ﴿١٨﴾

19. තවද ළඟාවන්නාවූ දඬුවම් දිනය ගැන ඔවුනට අනතුරු අඟවන්න. එවිට ඔවුන් ශෝකය මුළුමනින්ම යටපත් කරන අතරතුර ඔවුන්ගේ හදවත් උගුර කරා ලඟාවනු ඇත. වැරදිකරන්නන්ට කිසිදු ප්‍රිය මිතුරෙකු නොවනු ඇත. තවද (මැදිහත්වීම) භාරගනු ලබන කිසිම මැදිහත්කරුවෙකුද නොවනු ඇත.

وَأَنذِرْهُمْ يَوْمَ الْآزِفَةِ إِذِ الْقُلُوبُ لَدَى الْحَنَاجِرِ كَاظِمِينَ ۚ مَا لِلظَّالِمِينَ مِنْ حَمِيمٍ وَلَا شَفِيعٍ يُطَاعُ ﴿١٩﴾

20. ඇස්හි වංකභාවයද සිත් සඟවන දේද ඔහු දන්නේය.

يَعْلَمُ خَائِنَةَ الْأَعْيُنِ وَمَا تُخْفِي الصُّدُورُ ﴿٢٠﴾

21. තවද අල්ලාහ් සත්‍යයෙන් යුතුව විනිශ්චය කරන්නේය. එහෙත් ඔහු හැර ඔවුන් කැඳවන අන් අය ගත්කල ඔවුන් කිසිවක් විනිශ්චය නොකරන්නෝය. නියතවශයෙන්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

وَاللَّهُ يَقْضِي بِالْحَقِّ ۖ وَالَّذِينَ يَدْعُونَ مِن دُونِهِ لَا يَقْضُونَ بِشَيْءٍ ۗ إِنَّ اللَّهَ هُوَ السَّمِيعُ الْبَصِيرُ ﴿٢١﴾

22. ඔවුන් පොළොවෙහි සංචාරය නොකළේද? එසේනම් ඔවුන්ට පෙර සිටියවුන්ගේ අවසානය කෙසේ (නපුරු) වී දැයි ඔවුන්ට දැක ගන්නට තිබුණි. ඔවුන් මොවුන්ට වඩා බලසම්පන්න වූ අතර පොළොවෙහි ඔවුන් හැර ගිය සළකුණු අතින් ශක්තිමත් වූහ. නමුත් අල්ලාහ් ඔවුන්ගේ පව් හේතුවෙන් ඔවුන්ව හසුකරගත්තේය. තවද අල්ලාහ්ගෙන් ඔවුන්ව ආරක්ෂා කර ගැනීමට කිසිවෙකු නොවීය.

أَوَلَمْ يَسِيرُوا فِي الْأَرْضِ فَيَنظُرُوا كَيْفَ كَانَ عَاقِبَةُ الَّذِينَ كَانُوا مِن قَبْلِهِمْ ۚ كَانُوا هُمْ أَشَدَّ مِنْهُمْ قُوَّةً وَآثَارًا فِي الْأَرْضِ فَأَخَذَهُمُ اللَّهُ بِذُنُوبِهِمْ ۚ وَمَا كَانَ لَهُم مِّنَ اللَّهِ مِن وَاقٍ ﴿٢٢﴾

23. එයට වූ හේතුව නම්, ඔවුන් වෙතට ඔවුන්ගේ දූතයින් ප්‍රත්‍යක්ෂ සළකුණු සමග පැමිණියහ. නමුත් ඔවුන් ප්‍රතික්ෂේප කළහ. එබැවින් අල්ලාහ් ඔවුන්ව හසුකරගත්තේය. නියතවශයෙන්ම ඔහු ශක්ති සම්පන්නය දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

ذَٰلِكَ بِأَنَّهُمْ كَانَت تَّأْتِيهِمْ رُسُلُهُم بِالْبَيِّنَاتِ فَكَفَرُوا فَأَخَذَهُمُ اللَّهُ ۚ إِنَّهُ قَوِيٌّ شَدِيدُ الْعِقَابِ ﴿٢٣﴾

وَلَقَدْ أَرْسَلْنَا مُوسَىٰ بِآيَاتِنَا وَسُلْطَانٍ مُّبِينٍ ﴿٢٤﴾

24. තවද අපි මූසාව අපගේ සළකුණු සහ පැහැදිලි සාධකය සමග එව්වෙමු.

إِلَىٰ فِرْعَوْنَ وَهَامَانَ وَقَارُونَ فَقَالُوا سَاحِرٌ كَذَّابٌ ﴿٢٥﴾

25. ෆිර්අවුන් හාමාන් සහ කාරූන් වෙතටද (එව්වෙමු). නමුත් ඔවුහු, '(ඔහු) මායාකරුවෙක්ද මහත් මුසා වාදියෙක්ද වන්නේයැ'යි කීහ.

فَلَمَّا جَاءَهُم بِالْحَقِّ مِنْ عِندِنَا قَالُوا اقْتُلُوا أَبْنَاءَ الَّذِينَ آمَنُوا مَعَهُ وَاسْتَحْيُوا نِسَاءَهُمْ ۚ وَمَا كَيْدُ الْكَافِرِينَ إِلَّا فِي ضَلَالٍ ﴿٢٦﴾

26. තවද ඔහු අප වෙතින් සත්‍යය සමග ඔවුන් වෙත පැමිණි කල්හි ඔවුන්, 'ඔහු සමග විශ්වාස කළවුන්ගේ පුතුන්ව ඝාතනය කරනු. තවද ඔවුන්ගේ ස්ත්‍රීන්ව ජීවත් වන්නට ඉඩ හරිනු'යි කීහ. නමුත් අවිශ්වාසිතයින්ගේ උපාය අපතේ යෑමක් මිස අන් කිසිවක් නැත.

وَقَالَ فِرْعَوْنُ ذَرُونِي أَقْتُلْ مُوسَىٰ وَلْيَدْعُ رَبَّهُ ۖ إِنِّي أَخَافُ أَن يُبَدِّلَ دِينَكُمْ أَوْ أَن يُظْهِرَ فِي الْأَرْضِ الْفَسَادَ ﴿٢٧﴾

27. තවද ෆිර්අවුන්, 'මූසාව මා ඝාතනය කිරීමට මාහට ඉඩ හරිනු. තවද ඔහු තම අධිපතියාණන්ව කැඳවත්වා. ඔහු නුඹලාගේ ආගම වෙනස් කරාවිදෝ යැයිද නැතහොත් භූමිය කලහකාරිත්වයෙන් යටපත් කරාවිදෝ යැයි මා බියවන්නෙමි'යි කීවේය.

وَقَالَ مُوسَىٰ إِنِّي عُذْتُ بِرَبِّي وَرَبِّكُم مِّن كُلِّ مُتَكَبِّرٍ لَّا يُؤْمِنُ بِيَوْمِ الْحِسَابِ ﴿٢٨﴾

28. තවද මූසා, 'ගණන් ගැනීමේ දිනය කෙරෙහි විශ්වාස නොකරන සෑම උඩඟු (පුද්ගලයෙකු) ගෙන්ම මම මාගේ අධිපතියාණන්ගෙන්ද නුඹලාගේ අධිපතියාණන්ගෙන්ද රැකවරණය පතමි'යි පැවසීය.

وَقَالَ رَجُلٌ مُّؤْمِنٌ مِّنْ آلِ فِرْعَوْنَ يَكْتُمُ إِيمَانَهُ أَتَقْتُلُونَ رَجُلًا أَن يَقُولَ رَبِّيَ اللَّهُ وَقَدْ جَاءَكُم بِالْبَيِّنَاتِ مِن رَّبِّكُمْ ۖ وَإِن يَكُ كَاذِبًا فَعَلَيْهِ

29. තවද තම විශ්වාසය වසන් කර තැබූ ෆිර්අවුන්ගේ ජනතාවගෙන් විශ්වාසිත පුරුෂයෙක් (මෙසේ) පැවසුවේය. "නුඹලා මිනිසෙකුව, ඔහු 'මාගේ අධිපතියාණන් අල්ලාහ්යැ'යි පැවසූ නිසාම ඝාතනය කරන්නෙහුද? තවද ඔහු තම අධිපතියාණන්ගෙන් නුඹලා වෙත පැහැදිලි සාධකය ගෙනැවිත් ඇත. තවද ඔහු

كَذِبُهُ ۚ وَإِن يَكُ صَادِقًا يُصِبْكُم بَعْضُ الَّذِي يَعِدُكُمْ ۖ إِنَّ اللَّهَ لَا يَهْدِي مَنْ هُوَ مُسْرِفٌ كَذَّابٌ ﴿٢٩﴾

මුසාවාදියෙකු වේ නම් ඔහුගේ මුසාවෙහි (පව) ඔහු මත වන්නේය. නමුත් ඔහු සත්‍යවාදි වේ නම් එවිට ඔහු නුඹලාව බිය ගන්වන දෙයින් සමහරක් නුඹලා මතට (නියත වශයෙන්ම) පතිත වනු ඇත. නියතවශයෙන්ම අල්ලාහ් සීමාව ඉක්මවූවෙකුට මෙන්ම මුසාවාදියෙකුට මග නොපෙන්වන්නේය".

يَٰقَوْمِ لَكُمُ الْمُلْكُ الْيَوْمَ ظَٰهِرِينَ فِي الْأَرْضِ فَمَن يَنصُرُنَا مِنۢ بَأْسِ اللَّهِ إِن جَآءَنَا ۚ قَالَ فِرْعَوْنُ مَآ أُرِيكُمْ إِلَّا مَآ أَرَىٰ وَمَآ أَهْدِيكُمْ إِلَّا سَبِيلَ الرَّشَادِ ﴿٣٠﴾

30. "එම්බල මාගේ ජනතාවනි! මෙදින ආධිපත්‍යයය නුඹලාගේමය. නුඹලා භූමියෙහි අභිබවා සිටින්නන්ය. නමුත් අල්ලාහ්ගේ දඬුවම අප වෙත පැමිණියේ නම් (අපව ආරක්ෂා කර) අපට උදව් කරන්නේ කවුරුන්ද?" (එයට) ෆිර්අවුන් 'මම දකින දේම මම නුඹලාට පෙන්වා දෙන්නෙමි. තවද මා නුඹලාව යොමුකරන්නේ ඍජු මාර්ගයටයැ'යි කීවේය.

وَقَالَ الَّذِيٓ ءَامَنَ يَٰقَوْمِ إِنِّيٓ أَخَافُ عَلَيْكُم مِّثْلَ يَوْمِ الْأَحْزَابِ ﴿٣١﴾

31. තවද විශ්වාස කළ ඔහු, "එම්බල මාගේ ජනතාවනි! පෙර වූ විශාල ජනසමූහයන්ට අත් වූ විනාශ කාලයක් මෙන් කාලයක් නුඹලාටද ඇති වීම ගැන නියතවශයෙන් මම බිය වන්නෙමි"යි කීවේය.

مِثْلَ دَأْبِ قَوْمِ نُوحٍ وَعَادٍ وَثَمُودَ وَالَّذِينَ مِنۢ بَعْدِهِمْ ۚ وَمَا اللَّهُ يُرِيدُ ظُلْمًا لِّلْعِبَادِ ﴿٣٢﴾

32. "නූහ්ගේ ජනතාවටද ආද්ටද සමූද්ටද ඔවුන්ට පසු පැමිණි අයටද සිදු වූ දේ මෙන්ය. තවද අල්ලාහ් (ඔහුගේ) දාසයින් හට අසාධාරණයක් නොසිතන්නේය".

وَيَٰقَوْمِ إِنِّيٓ أَخَافُ عَلَيْكُمْ يَوْمَ التَّنَادِ ﴿٣٣﴾

33. "තවද එම්බල මාගේ ජනතාවනි! එකිනෙකා (උදව් පතා) අඬ ගසන දිනය ගැනත් මම නුඹලා කෙරෙහි බියවන්නෙමි".

يَوْمَ تُوَلُّونَ مُدْبِرِينَ مَا لَكُم مِّنَ اللَّهِ مِنْ عَاصِمٍ ۗ وَمَن يُضْلِلِ اللَّهُ فَمَا لَهُۥ مِنْ هَادٍ ﴿٣٤﴾

34. "(එය) නුඹලා පසුපස හැරී පලායන්නාවූ දිනයයි. අල්ලාහ්ට එරෙහිව කිසිදු ආරක්ෂකයෙක් නුඹලාට නොවනු ඇත. තවද අල්ලාහ් යමෙකුට නොමග යන්නට ඉඩ හරින්නේද ඔහුට මග පෙන්වන්නෙකු නොවනු ඇත".

35. "තවද නියතවශයෙන්ම මීට පෙර පැහැදිලි සාධක සමග යූසුෆ් නුඹලා වෙත පැමිණියේය. නමුත් ඔහු ගෙන ආ දේ සම්බන්ධයෙන් නුඹලා සැකයෙහි මිස නොවූවෙහුය. ඔහු මරණයට පත් වූ විට නුඹලා, 'ඔහුට පසු අල්ලාහ් කිසිවිටෙකත් දූතයෙකු නොඑවන්නේමයැ'යි කීවෙහුය. අල්ලාහ් සීමාව ඉක්මවූ අයවද සැකයෙන් පසුවන අයවද මෙලෙස නොමග යන්නට ඉඩ හරින්නේය".

وَلَقَدۡ جَآءَكُمۡ يُوسُفُ مِن قَبۡلُ بِٱلۡبَيِّنَٰتِ فَمَا زِلۡتُمۡ فِي شَكّٖ مِّمَّا جَآءَكُم بِهِۦۖ حَتَّىٰٓ إِذَا هَلَكَ قُلۡتُمۡ لَن يَبۡعَثَ ٱللَّهُ مِنۢ بَعۡدِهِۦ رَسُولٗاۚ كَذَٰلِكَ يُضِلُّ ٱللَّهُ مَنۡ هُوَ مُسۡرِفٞ مُّرۡتَابٌ ٣٥

36. "ඔවුන් අල්ලාහ්ගේ සළකුණු සම්බන්ධව තමන් වෙත කිසිදු සාධකයක් නොමැතිව වාද කරන්නෝය. මෙය අල්ලාහ්ගේ දැක්මෙහිද විශ්වාසිත අයගේ දැක්මෙහිද අතිශයින්ම පිළිකුල් වූ දෙයකි. මෙලෙස අල්ලාහ් සෑම උඩඟු මෙන්ම අහංකාර වූවන්ගේ හදවතෙහි මුද්‍රා තබන්නේය."

ٱلَّذِينَ يُجَٰدِلُونَ فِيٓ ءَايَٰتِ ٱللَّهِ بِغَيۡرِ سُلۡطَٰنٍ أَتَىٰهُمۡۖ كَبُرَ مَقۡتًا عِندَ ٱللَّهِ وَعِندَ ٱلَّذِينَ ءَامَنُواْۚ كَذَٰلِكَ يَطۡبَعُ ٱللَّهُ عَلَىٰ كُلِّ قَلۡبِ مُتَكَبِّرٖ جَبَّارٖ ٣٦

37. තවද ෆිර්අවුන් (මෙසේ) කීවේය. 'එම්බා හාමාන්! මා පිවිසුම් මාර්ග කරා ලඟා වනු පිණිස මා හට උස් වූ කුළුණක් තනනු'.

وَقَالَ فِرۡعَوۡنُ يَٰهَٰمَٰنُ ٱبۡنِ لِي صَرۡحٗا لَّعَلِّيٓ أَبۡلُغُ ٱلۡأَسۡبَٰبَ ٣٧

38. 'ඒවා මූසාගේ දෙවියන් දෙස මා හට බැල්මක් හෙළීමට හැකිවනු පිණිස අහස් කරා ලඟාවීමට මාර්ගයන්ය. තවද නියතවශයෙන්ම මා ඔහුව මුසාවාදියෙකු'යැයි සිතමි. තවද මෙලෙස ෆිර්අවුන්ගේ දැක්මෙහි තම නපුරු ක්‍රියාව අලංකාරව පෙනෙන්නට සලස්වන ලදී. තවද ඔහු (යහ)මගින් ඉවතට හරවන ලදී. තවද ෆිර්අවුන්ගේ උපාය විනාශයෙහි මිස නොවීය.

أَسۡبَٰبَ ٱلسَّمَٰوَٰتِ فَأَطَّلِعَ إِلَىٰٓ إِلَٰهِ مُوسَىٰ وَإِنِّي لَأَظُنُّهُۥ كَٰذِبٗاۚ وَكَذَٰلِكَ زُيِّنَ لِفِرۡعَوۡنَ سُوٓءُ عَمَلِهِۦ وَصُدَّ عَنِ ٱلسَّبِيلِۚ وَمَا كَيۡدُ فِرۡعَوۡنَ إِلَّا فِي تَبَابٖ ٣٨ ع

39. තවද විශ්වාස කළ ඔහු (මෙසේ) කීවේය. 'එම්බල මාගේ ජනතාවෙනි! මා අනුගමනය කරනු. මම නුඹලාව ඍජු මගට යොමුකරන්නෙමි'.

وَقَالَ ٱلَّذِيٓ ءَامَنَ يَٰقَوۡمِ ٱتَّبِعُونِ أَهۡدِكُمۡ سَبِيلَ ٱلرَّشَادِ ٣٩

يَٰقَوْمِ إِنَّمَا هَٰذِهِ ٱلْحَيَوٰةُ ٱلدُّنْيَا مَتَٰعٌ وَإِنَّ ٱلْءَاخِرَةَ هِىَ دَارُ ٱلْقَرَارِ ﴿٤٠﴾

40. 'එම්බල මාගේ ජනතාවෙනි! මෙලෝ ජීවිතය (තාවකාලික) ජීවනෝපායක් මිස නැත. තවද නියතවශයෙන්ම පරලොව ස්ථිර වාසස්ථානය වේ'.

مَنْ عَمِلَ سَيِّئَةً فَلَا يُجْزَىٰٓ إِلَّا مِثْلَهَا ۖ وَمَنْ عَمِلَ صَٰلِحًا مِّن ذَكَرٍ أَوْ أُنثَىٰ وَهُوَ مُؤْمِنٌ فَأُو۟لَٰٓئِكَ يَدْخُلُونَ ٱلْجَنَّةَ يُرْزَقُونَ فِيهَا بِغَيْرِ حِسَابٍ ﴿٤١﴾

41. 'කවරෙකු හෝ නපුරක් කරන්නේද, එයට සමාන දෙයකින්ම ඔහුට ප්‍රතිවිපාක දෙනු ලබන්නේය. නමුත් කවරෙකු හෝ යහපතක් කරන්නේද එවැන්නා පුරුෂ හෝ ස්ත්‍රී හෝ වේවා තවද විශ්වාසිතයෙකුද නම්, ඔවුන්ම උද්‍යානයෙහි පිවිසෙන්නෝය. එහිදී ඔවුන්ට අප්‍රමාණ ජීවනෝපාය දෙනු ලබන්නේය'.

وَيَٰقَوْمِ مَا لِىٓ أَدْعُوكُمْ إِلَى ٱلنَّجَوٰةِ وَتَدْعُونَنِىٓ إِلَى ٱلنَّارِ ﴿٤٢﴾

42. 'තවද එම්බල මාගේ ජනතාවෙනි! මෙය කෙතරම් (විස්මයක්)ද, මා නුඹලාව විමුක්තිය වෙත කැඳවන්නෙමි. නමුත් නුඹලා මාව ගින්න වෙතට කැඳවන්නෙහුය'.

تَدْعُونَنِى لِأَكْفُرَ بِٱللَّهِ وَأُشْرِكَ بِهِۦ مَا لَيْسَ لِى بِهِۦ عِلْمٌ وَأَنَا۠ أَدْعُوكُمْ إِلَى ٱلْعَزِيزِ ٱلْغَفَّٰرِ ﴿٤٣﴾

43. 'මා අල්ලාහ් කෙරෙහි අවිශ්වාස කරන්නටත් මා හට දැනුම නැති දෙයින් මා ඔහුට සමානයන් තබන්නටත් නුඹලා මාව කැඳවන්නෙහුය. නමුත් මා නුඹලාව බලසම්පන්න මෙන්ම ඉතා ක්ෂමාශීලී (අල්ලාහ්) වෙතට කැඳවන්නෙමි'.

لَا جَرَمَ أَنَّمَا تَدْعُونَنِىٓ إِلَيْهِ لَيْسَ لَهُۥ دَعْوَةٌ فِى ٱلدُّنْيَا وَلَا فِى ٱلْءَاخِرَةِ وَأَنَّ مَرَدَّنَآ إِلَى ٱللَّهِ وَأَنَّ ٱلْمُسْرِفِينَ هُمْ أَصْحَٰبُ ٱلنَّارِ ﴿٤٤﴾

44. 'නියතවශයෙන්ම නුඹලා කුමන දේට මාව කැඳවන්නේද එයට මෙලොවෙහි හෝ පරලොවෙහි හෝ ඇරයුම් කිරීමේ අයිතියක් නැත. තවද අපගේ ආපසු පැමිණීම නිශ්චිතවම අල්ලාහ් වෙතටය. තවද නිශ්චිතවම සීමාව ඉක්මවන්නන් ගින්නේ සහකරුවන් වන්නෝය'.

فَسَتَذْكُرُونَ مَآ أَقُولُ لَكُمْ ۚ وَأُفَوِّضُ أَمْرِىٓ إِلَى ٱللَّهِ ۚ إِنَّ ٱللَّهَ بَصِيرٌۢ بِٱلْعِبَادِ ﴿٤٥﴾

45. 'එබැවින් මා නුඹලාට පවසන දේ නුඹලා නොපමාව සිහිපත් කරන්නෙහුය. තවද මා මාගේ කටයුත්ත අල්ලාහ් වෙත භාර කරමි. සැබැවින්ම අල්ලාහ් (ඔහුගේ සියළු) දාසයින්ව මැනැවින් දකින්නාය'.

46. (එහි වූ ප්‍රතිඵලය නම්) ඔවුන් කුමන්ත්‍රණය කළ නපුරුකම් වලින් අල්ලාහ් ඔහුව ආරක්ෂා කළේය. තවද බරපතල දඬුවම ෆිර්අවුන්ගේ ජනයාව වෙලාගත්තේය.

فَوَقٰىهُ اللّٰهُ سَيِّاٰتِ مَا مَكَرُوْا وَحَاقَ بِاٰلِ فِرْعَوْنَ سُوْٓءُ الْعَذَابِ ۚ ﴿٤٦﴾

47. ගින්නය, ඔවුන් උදය සහ සවසෙහි එයට මුහුණපාන්නට සලස්වනු ලබන්නෝය. තවද එම හෝරාව පැමිණෙන එදින, 'ෆිර්අවුන්ගේ ජනයාව දැඩි දඬුවමෙහි ඇද දමනු'(යි කියනු ලබන්නේය).

اَلنَّارُ يُعْرَضُوْنَ عَلَيْهَا غُدُوًّا وَّعَشِيًّا ۚ وَيَوْمَ تَقُوْمُ السَّاعَةُ ۗ اَدْخِلُوْٓا اٰلَ فِرْعَوْنَ اَشَدَّ الْعَذَابِ ﴿٤٧﴾

48. තවද ඔවුන් ගින්නෙහි එකිනෙකා අතර තර්ක කරන කල්හි, දුබලයින් ආඩම්බර වූ අයහට, 'සැබැවින්ම අපි නුඹලාගේ අනුගාමිකයින් වූයෙමු. එමනිසා නුඹලාට අපව ගින්නේ කුමන හෝ කොටසකින් නිදහස් කළ හැකිදැ?'යි පවසන්නෝය.

وَاِذْ يَتَحَآجُّوْنَ فِى النَّارِ فَيَقُوْلُ الضُّعَفٰٓؤُا لِلَّذِيْنَ اسْتَكْبَرُوْٓا اِنَّا كُنَّا لَكُمْ تَبَعًا فَهَلْ اَنْتُمْ مُّغْنُوْنَ عَنَّا نَصِيْبًا مِّنَ النَّارِ ﴿٤٨﴾

49. ආඩම්බර වූ අය, 'දැන් අපි සියල්ලන්ම එහි තුළය. අල්ලාහ් දැනටමත් (ඔහුගේ) දාසයින් අතර විනිශ්චය කර ඇත්තේයැ'යි පවසන්නෝය.

قَالَ الَّذِيْنَ اسْتَكْبَرُوْٓا اِنَّا كُلٌّ فِيْهَآ ۙ اِنَّ اللّٰهَ قَدْ حَكَمَ بَيْنَ الْعِبَادِ ﴿٤٩﴾

50. තවද ගින්නෙහි සිටින්නන් නිරයේ පාලකයින් වෙත, 'නුඹලාගේ අධිපතියාණන්ගෙන්, අප වෙනුවෙන් දඬුවම (එක්) දිනකට වත් ලිහිල් කරන ලෙස අයැදිනු'යි කියන්නෝය.

وَقَالَ الَّذِيْنَ فِى النَّارِ لِخَزَنَةِ جَهَنَّمَ ادْعُوْا رَبَّكُمْ يُخَفِّفْ عَنَّا يَوْمًا مِّنَ الْعَذَابِ ﴿٥٠﴾

51. (පාලකයින් වන) ඔවුහු, 'නුඹලා වෙත පැහැදිලි සළකුණු සමග නුඹලාගේ දූතයින් නොපැමිණියෙහුදැ?'යි කියන්නෝය. ඔවුන් 'එසේයැ'යි කියනු ඇත. (එයට) ඔවුහු 'එසේනම් ප්‍රාර්ථනා කරනු'යි කියන්නෝය. නමුත් අවිශ්වාසිතයින්ගේ ප්‍රාර්ථනාව එලක් නොවන්නේය.

قَالُوْٓا اَوَلَمْ تَكُ تَاْتِيْكُمْ رُسُلُكُمْ بِالْبَيِّنٰتِ ؕ قَالُوْا بَلٰى ؕ قَالُوْا فَادْعُوْا ۚ وَمَا دُعٰٓؤُا الْكٰفِرِيْنَ اِلَّا فِىْ ضَلٰلٍ ﴿٥١﴾

إِنَّا لَنَنصُرُ رُسُلَنَا وَالَّذِينَ آمَنُوا فِي الْحَيَاةِ الدُّنْيَا وَيَوْمَ يَقُومُ الْأَشْهَادُ ﴿٥٢﴾

52. නියතවශයෙන්ම අපි අපගේ දූතයින්ටද විශ්වාස කළ අයටද මෙලෝ ජීවිතයෙහි මෙන්ම සාක්ෂිකරුවන් නැගිසිටින එදිනෙහිද උදව් කරන්නෙමු.

يَوْمَ لَا يَنفَعُ الظَّالِمِينَ مَعْذِرَتُهُمْ وَلَهُمُ اللَّعْنَةُ وَلَهُمْ سُوءُ الدَّارِ ﴿٥٣﴾

53. එදින වරදකරුවන්ට ඔවුන්ගේ නිදහසට කරනු දැක්වීම එලක් නොවනු ඇත. තවද ඔවුනට ශාපය වනු ඇත. තවද ඔවුනට නපුරු වාසස්ථානය ඇත.

وَلَقَدْ آتَيْنَا مُوسَى الْهُدَىٰ وَأَوْرَثْنَا بَنِي إِسْرَائِيلَ الْكِتَابَ ﴿٥٤﴾

54. තවද ඇත්තෙන්ම අපි මූසාට මගපෙන්වීම දුනිමු. තවද ඉස්රාඊලයේ දරුවන්ව පුස්තකයට උරුමක්කාරයින් කළෙමු.

هُدًى وَذِكْرَىٰ لِأُولِي الْأَلْبَابِ ﴿٥٥﴾

55. (එය) වටහාගන්නා මිනිසුනට මගපෙන්වීමක්ද සිහිකිරීමක්ද වේ.

فَاصْبِرْ إِنَّ وَعْدَ اللَّهِ حَقٌّ وَاسْتَغْفِرْ لِذَنبِكَ وَسَبِّحْ بِحَمْدِ رَبِّكَ بِالْعَشِيِّ وَالْإِبْكَارِ ﴿٥٦﴾

56. එබැවින් ඉවසිලිමත්වන්න. නියතවශයෙන්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය වේ. තවද ඔබගේ සහජ දුර්වලතාවය වෙනුවෙන් ක්ෂමාව අයැදින්න. තවද සවස්හිද උදයෙහිද ඔබගේ අධිපතියාණන්ගේ ප්‍රසංශාව සමග (ඔහුව) සුවිශුද්ධ කරන්න.

إِنَّ الَّذِينَ يُجَادِلُونَ فِي آيَاتِ اللَّهِ بِغَيْرِ سُلْطَانٍ أَتَاهُمْ ۙ إِن فِي صُدُورِهِمْ إِلَّا كِبْرٌ مَّا هُم بِبَالِغِيهِ ۚ فَاسْتَعِذْ بِاللَّهِ ۖ إِنَّهُ هُوَ السَّمِيعُ الْبَصِيرُ ﴿٥٧﴾

57. නියතවශයෙන්ම කිසිදු සාධකයක් නොමැතිව තමන්වෙත පැමිණි අල්ලාහ්ගේ සළකුණු සම්බන්ධව වාද කරන අය ගත්කල ඔවුන්ගේ සිත්හි මහත් වූ අහංකාරය මිස අන් කිසිවක් නැත. එය ඔවුන්ට කිසිසේත්ම මුදුන්පත් කරගත නොහැක. එබැවින් අල්ලාහ් වෙත රැකවරණය පතන්න. නියතවශයෙන්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

لَخَلْقُ السَّمَاوَاتِ وَالْأَرْضِ أَكْبَرُ مِنْ خَلْقِ النَّاسِ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَعْلَمُونَ ﴿٥٨﴾

58. නිශ්චිතවම අහස් සහ පොළොව මැවීම මිනිස් වර්ගයාව මැවීමට වඩා ඉමහත්ය. නමුත් බොහෝ මිනිසුන් නොදනිති.

59. තවද අන්ධයෙකු සහ පෙනීම ඇත්තෙකු සමාන නොවෙති. එසේම විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අය සහ නපුරු දේ කරන අය සමාන නොවෙති. නුඹලා මෙනෙහි කරන්නේ ඉතා ස්වල්පයකි.

وَمَا يَسْتَوِي الْأَعْمَىٰ وَالْبَصِيرُ وَالَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ وَلَا الْمُسِيءُ ۚ قَلِيلًا مَّا تَتَذَكَّرُونَ ٥٩

60. නියතවශයෙන්ම එම හෝරාව පැමිණෙනු ඇත. එය පිළිබඳව කිසිදු සැකයක් නැත. නමුත් බොහෝ මිනිසුන් විශ්වාස නොකරති.

إِنَّ السَّاعَةَ لَآتِيَةٌ لَّا رَيْبَ فِيهَا وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يُؤْمِنُونَ ٦٠

61. තවද නුඹලාගේ අධිපතියාණන් 'මාගෙන් අයැදිනු, මම නුඹලාගේ (අයැදීමට) ප්‍රතිචාර දක්වන්නෙමි. නමුත් මාහට නැමදීමෙන් දැඩි අහංකාර වූ අය නියතවශයෙන්ම නින්දිතව නිරයට පිවිසෙන්නෝය'යි පවසයි.

وَقَالَ رَبُّكُمُ ادْعُونِي أَسْتَجِبْ لَكُمْ ۚ إِنَّ الَّذِينَ يَسْتَكْبِرُونَ عَنْ عِبَادَتِي سَيَدْخُلُونَ جَهَنَّمَ دَاخِرِينَ ٦١

62. නුඹලාට රාත්‍රිය එහි නුඹලා විවේක ගනු පිණිසද දහවල (නුඹලා) බැලීම(ට හැකිවනු) පිණිසද කර ඇත්තේ අල්ලාහ්මය. සැබැවින්ම අල්ලාහ් මනුෂ්‍යයින්ට වරප්‍රසාද පිරිනමන්නාය. නමුත් බොහෝ මිනිසුන් කෘතඥ නොවෙති.

اللَّهُ الَّذِي جَعَلَ لَكُمُ اللَّيْلَ لِتَسْكُنُوا فِيهِ وَالنَّهَارَ مُبْصِرًا ۚ إِنَّ اللَّهَ لَذُو فَضْلٍ عَلَى النَّاسِ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَشْكُرُونَ ٦٢

63. එවැන්නා අල්ලාහ්ය. නුඹලාගේ අධිපතියාණන්ය. සියළුම දෑහි මැවුම්කරුවාය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නැත. එසේනම් නුඹලා හරවනු ලබන්නේ කොයි බටද?

ذَٰلِكُمُ اللَّهُ رَبُّكُمْ خَالِقُ كُلِّ شَيْءٍ لَّا إِلَٰهَ إِلَّا هُوَ ۖ فَأَنَّىٰ تُؤْفَكُونَ ٦٣

64. ඇත්තෙන්ම අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන්නන් හරවනු ලබන්නේ මෙලෙසය.

كَذَٰلِكَ يُؤْفَكُ الَّذِينَ كَانُوا بِآيَاتِ اللَّهِ يَجْحَدُونَ ٦٤

65. නුඹලාට පොළොව නවාතැනක්

اللَّهُ الَّذِي جَعَلَ لَكُمُ الْأَرْضَ قَرَارًا

وَّالسَّمَآءَ بِنَآءً وَّ صَوَّرَكُمۡ فَاَحۡسَنَ صُوَرَكُمۡ وَرَزَقَكُمۡ مِّنَ الطَّيِّبٰتِ ؕ ذٰلِكُمُ اللّٰهُ رَبُّكُمۡ ۖۚ فَتَبٰرَكَ اللّٰهُ رَبُّ الۡعٰلَمِيۡنَ ﴿٦٥﴾

ලෙසද අහස යැපිමේ මාර්ගයක් ලෙසද ඇති කළේ අල්ලාහ්ය. තවද ඔහු නුඹලාව හැඩගස්වා නුඹලාගේ හැඩයන් විශිෂ්ඨවත් කළේය. තවද නුඹලාට පවිත්‍ර දෙයින් ජිවනෝපාය සපයා දුන්නේය. නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ් එලෙසය. එබැවින් සර්ව ලෝකයන්ට අධිපතියාණන් වූ අල්ලාහ් ආශිර්වාදයෙන් පරිපූර්ණය.

هُوَ الۡحَـىُّ لَاۤ اِلٰهَ اِلَّا هُوَ فَادۡعُوۡهُ مُخۡلِصِيۡنَ لَهُ الدِّيۡنَ ؕ اَلۡحَمۡدُ لِلّٰهِ رَبِّ الۡعٰلَمِيۡنَ ﴿٦٦﴾

66. ඔහු ජිවමානය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නැත. එබැවින් ධර්මයෙහි ඔහුටම අවංක වෙමින්, ඔහුගෙන්ම අයැදිනු. සර්ව ලෝකයන්ට අධිපතියාණන් වන අල්ලාහ්ටම සියළු ප්‍රශංසා අයත් වේ.

قُلۡ اِنِّىۡ نُهِيۡتُ اَنۡ اَعۡبُدَ الَّذِيۡنَ تَدۡعُوۡنَ مِنۡ دُوۡنِ اللّٰهِ لَمَّا جَآءَنِىَ الۡبَيِّنٰتُ مِنۡ رَّبِّىۡ وَاُمِرۡتُ اَنۡ اُسۡلِمَ لِرَبِّ الۡعٰلَمِيۡنَ ﴿٦٧﴾

67. පවසන්න, 'මාගේ අධිපතියාණන් (වන අල්ලාහ්) වෙතින් පැහැදිලි සාධක මා වෙත පැමිණ ඇති බැවින්, මා අල්ලාහ් හැර නුඹලා කැඳවන දේට නැමදීමෙන් නියතවශයෙන්ම මම තහනම් කරන ලද්දෙමි. තවද සර්ව ලෝකයන්ටම අධිපතියාණන්හට මා අවනත වීමට මම අණ කරන ලද්දෙමි'

هُوَ الَّذِىۡ خَلَقَكُمۡ مِّنۡ تُرَابٍ ثُمَّ مِنۡ نُّطۡفَةٍ ثُمَّ مِنۡ عَلَقَةٍ ثُمَّ يُخۡرِجُكُمۡ طِفۡلًا ثُمَّ لِتَبۡلُغُوۡۤا اَشُدَّكُمۡ ثُمَّ لِتَكُوۡنُوۡا شُيُوۡخًا ۚ وَمِنۡكُمۡ مَّنۡ يُّتَوَفّٰى مِنۡ قَبۡلُ وَلِتَبۡلُغُوۡۤا اَجَلًا مُّسَمًّى وَّلَعَلَّكُمۡ تَعۡقِلُوۡنَ ﴿٦٨﴾

68. නුඹලාව පස් දූවිල්ලෙන්ද පසුව ශුක්‍ර බිඳුවකින්ද පසුව ලේ කැටියෙන්ද මැව්වේ ඔහුමය. පසුව ඔහු නුඹලාව බිළිඳකු ලෙස පිටතට ගෙන එන්නේය. පසුව නුඹලා නුඹලාගේ සම්පූර්ණ පරිණත අවධිය ලබා ගනු පිණිස (ඔහු නුඹලාව වර්ධනය වීමට) ඉඩ හරින්නේය. පසුව ඔහු නුඹලාව මහළු වන්නට (ඉඩ හරින්නේ)ය. එසේ තිබියදිත් නුඹලා අතුරින් සමහරු ඊට පෙරම මරණයට පත් කරනු ලබන්නෙහුය. තවද නුඹලා නියමිත කාලය කරා ළඟාවනු පිණිසද නුඹලා ප්‍රඥාව ලබාගනු පිණිසද (ඔහු නුඹලාව ජිවත් වන්නට ඉඩ හරින්නේ)ය.

هُوَ الَّذِىۡ يُحۡىٖ وَيُمِيۡتُۚ فَاِذَا قَضٰۤى اَمۡرًا فَاِنَّمَا يَقُوۡلُ لَهٗ كُنۡ فَيَكُوۡنُ ﴿٦٩﴾

69. ජීවය දෙන්නේද මරණයට පමුණුවන්නේද ඔහුමය. තවද ඔහු යම් දෙයක් තීන්දු කරන විට එයට 'වනු!'යි පමණක් ඔහු පවසන්නේය. එවිට එය වන්නේය.

اَلَمۡ تَرَ اِلَى الَّذِيۡنَ يُجَادِلُوۡنَ فِىۡۤ اٰيٰتِ اللّٰهِ ؕ اَنّٰى يُصۡرَفُوۡنَ ﴿٧٠﴾

70. අල්ලාහ්ගේ සළකුණු පිළිබඳ විවාද කරන අයව ඔබ දැක නොතිබේද? ඔවුන් කොහේ හරවනු ලබන්නේද!

اَلَّذِيۡنَ كَذَّبُوۡا بِالۡكِتٰبِ وَبِمَاۤ اَرۡسَلۡنَا بِهٖ رُسُلَنَا ۛ فَسَوۡفَ يَعۡلَمُوۡنَ ۙ ﴿٧١﴾

71. ඔවුන් පුස්තකයද අපගේ දූතයින් සමග අප එවූ දේද ප්‍රතික්ෂේප කරන්නෝය. නමුත් ඔවුන් ඉක්මනින්ම දැනගන්නෝය.

اِذِ الۡاَغۡلٰلُ فِىۡۤ اَعۡنَاقِهِمۡ وَالسَّلٰسِلُ ؕ يُسۡحَبُوۡنَ ۙ ﴿٧٢﴾

72. ඔවුන්ගේ ගෙලවටා යකඩ මාංචු සහ දම්වැල් තිබෙන කල්හි, ඔවුන් ඇදගෙන යනු ලබන්නෝය.

فِى الۡحَمِيۡمِ ۙ ثُمَّ فِى النَّارِ يُسۡجَرُوۡنَ ۚ ﴿٧٣﴾

73. උතුරන්නාවූ ජලයෙහිය, පසුව ගින්නෙහි ඔවුන් දැවෙනු ලබන්නෝය.

ثُمَّ قِيۡلَ لَهُمۡ اَيۡنَ مَا كُنۡتُمۡ تُشۡرِكُوۡنَ ۙ ﴿٧٤﴾

74. පසුව ඔවුන්ගෙන් 'නුඹලා (අල්ලාහ්ට) සමාන තැබූ අය කොහේදැ?'යි අසනු ලබන්නේය.

مِنۡ دُوۡنِ اللّٰهِ ؕ قَالُوۡا ضَلُّوۡا عَنَّا بَلْ لَّمۡ نَكُنۡ نَّدۡعُوۡا مِنۡ قَبۡلُ شَيۡـًٔـا ؕ كَذٰلِكَ يُضِلُّ اللّٰهُ الۡكٰفِرِيۡنَ ﴿٧٥﴾

75. 'අල්ලාහ් හැරය' ඔවුන් (මෙසේ) කියනු ඇත. 'ඔවුන් අපගෙන් අතුරුදහන් වී ඇත. නොඑසේය, අප කිසිවිටෙකත් මීට පෙර අයැදුවේ නොමැත'. මෙලෙස අල්ලාහ් අවිශ්වාසිතයින්ව නොමග යන්නට සලස්වන්නේය.

ذٰلِكُمۡ بِمَا كُنۡتُمۡ تَفۡرَحُوۡنَ فِى الۡاَرۡضِ بِغَيۡرِ الۡحَـقِّ وَبِمَا كُنۡتُمۡ تَمۡرَحُوۡنَ ۚ ﴿٧٦﴾

76. 'එයට හේතුව නුඹලා යුක්තියෙන් තොරව පොළොවෙහි උදම් වූ බැවිනි. තවද නුඹලා මහත් අහංකාරව හැසිරුණ බැවිනි'.

اُدۡخُلُوۡۤا اَبۡوَابَ جَهَنَّمَ خٰلِدِيۡنَ فِيۡهَا ۚ فَبِئۡسَ مَثۡوَى الۡمُتَكَبِّرِيۡنَ ﴿٧٧﴾

77. 'නුඹලා නිරයේ දොරටුවලින් එහි දිගු කල් වාසය කිරීමට ඇතුළු වනු. තවද අහංකාරවන්නන්ගේ වාසස්ථානය ඉතා නපුරුය'.

78. එමනිසා ඉවසිලිමත්වන්න. නියතවශයෙන්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යයකි. තවද අපි ඔබට පොරොන්දු වූ දෙයින් කොටසක් අප ඔබට පෙන්වුවද, නැතහොත් (අපගේ පොරොන්දුව ඉටු වීමට පෙර) අප ඔබව මරණයට පත් කළද (එය කෙසේ වෙතත්) ඔවුන් ආපසු ගෙන එනු ලබන්නේ අප වෙතටමය.

فَاصْبِرْ اِنَّ وَعْدَ اللّٰهِ حَقٌّ ۚ فَاِمَّا نُرِيَنَّكَ بَعْضَ الَّذِىْ نَعِدُهُمْ اَوْ نَتَوَفَّيَنَّكَ فَاِلَيْنَا يُرْجَعُوْنَ ۝٧٨

79. තවද අපි ඔබට පෙර දූතයින් එවා ඇත්තෙමු. අපි ඔබට ඔවුන්ගෙන් සමහර අය ගැන සඳහන් කර ඇත්තෙමු. තවද අප ඔබට සඳහන් කර නොමැති ඔවුන්ගෙන් සමහර අයද වෙති. තවද අල්ලාහ්ගේ අවසරයෙන් තොරව කිසිදු දූතයෙකුටත් සළකුණක් ගෙන ඒමට නොහැක. නමුත් අල්ලාහ්ගේ තීන්දුව පැමිණෙනවිට, එය සත්‍යයෙන් යුතුව තීරණය කරන ලදී. තවද බොරු පවසන්නන් විනාශයට පත් වනු ඇත.

وَلَقَدْ اَرْسَلْنَا رُسُلًا مِّنْ قَبْلِكَ مِنْهُمْ مَّنْ قَصَصْنَا عَلَيْكَ وَمِنْهُمْ مَّنْ لَّمْ نَقْصُصْ عَلَيْكَ ؕ وَمَا كَانَ لِرَسُوْلٍ اَنْ يَّاْتِىَ بِاٰيَةٍ اِلَّا بِاِذْنِ اللّٰهِ ۚ فَاِذَا جَآءَ اَمْرُ اللّٰهِ قُضِىَ بِالْحَقِّ وَخَسِرَ هُنَالِكَ الْمُبْطِلُوْنَ ۝٧٩

80. අල්ලාහ්, ඔහු නුඹලාට ගවසතුන්, නුඹලා උන්ගෙන් සමහරෙකුගේ පිටඋඩ යෑම සඳහාද උන්ගෙන් සමහරෙකුව අනුභව කිරීම සඳහාද ඇති කළේය.

اَللّٰهُ الَّذِىْ جَعَلَ لَـكُمُ الْاَنْعَامَ لِتَرْكَبُوْا مِنْهَا وَمِنْهَا تَاْكُلُوْنَ ۝٨٠

81. තවද නුඹලාට උන්ගෙන් (අනෙකුත්) ප්‍රයෝජනයන්ද ඇත. තවද එය නුඹලාගේ සිත්හි උවමනාවන් නුඹලා උන්ගෙන් ඉටු කර ගනු පිණිසය. තවද උන් මතද නැව් මතද නුඹලා උසුලනු ලබන්නෙහුය.

وَلَكُمْ فِيْهَا مَنَافِعُ وَلِتَبْلُغُوْا عَلَيْهَا حَاجَةً فِىْ صُدُوْرِكُمْ وَعَلَيْهَا وَعَلَى الْفُلْكِ تُحْمَلُوْنَ ۝٨١

82. තවද ඔහු නුඹලාට ඔහුගේ සළකුණු පෙන්වන්නේය. එසේනම් අල්ලාහ්ගේ සළකුණු වලින් කුමන දේ නුඹලා ප්‍රතික්ෂේප කරන්නෙහුද?

وَيُرِيْكُمْ اٰيٰتِهٖ ۖ فَاَىَّ اٰيٰتِ اللّٰهِ تُنْكِرُوْنَ ۝٨٢

83. ඔවුන්ට පෙර සිටියවුන්ගේ අවසානය කෙසේ විදැයි ඔවුන් දැක

اَفَلَمْ يَسِيْرُوْا فِى الْاَرْضِ فَيَنْظُرُوْا

كَيۡفَ كَانَ عَاقِبَةُ الَّذِيۡنَ مِنۡ قَبۡلِهِمۡ‌ؕ كَانُوۡۤا اَكۡثَرَ مِنۡهُمۡ وَاَشَدَّ قُوَّةً وَّاٰثَارًا فِى الۡاَرۡضِ فَمَاۤ اَغۡنٰى عَنۡهُمۡ مَّا كَانُوۡا يَكۡسِبُوۡنَ ﴿٨٣﴾

ගනු පිණිස ඔවුන් පොළොවෙහි සංචාරය නොකළේද? ඔවුන් මොවුන්ට වඩා සංඛ්‍යාවෙන් අධික වූහ. (ඔවුන්) පොළොවෙහි (හැර ගිය) සළකුණු අතින්ද, බලයෙන් ශක්තිමත් වූහ. නමුත් ඔවුන් ඉපැයූ සියල්ල ඔවුනට කිසිදු ඵලක් නොවීය.

فَلَمَّا جَآءَتۡهُمۡ رُسُلُهُمۡ بِالۡبَيِّنٰتِ فَرِحُوۡا بِمَا عِنۡدَهُمۡ مِّنَ الۡعِلۡمِ وَحَاقَ بِهِمۡ مَّا كَانُوۡا بِهٖ يَسۡتَهۡزِءُوۡنَ ﴿٨٤﴾

84. තවද, ඔවුන්ගේ දූතයින් ප්‍රකට සළකුණු සමගින් ඔවුන් වෙතට පැමිණි විට, තමන්ට හිමිවූ දැනුම හේතුවෙන් උදම් වූහ. තවද, ඔවුන් සරදම් කරමින් සිටි දේ ඔවුන්ව වෙළා ගත්තේය.

فَلَمَّا رَاَوۡا بَاۡسَنَا قَالُوۡۤا اٰمَنَّا بِاللّٰهِ وَحۡدَهٗ وَكَفَرۡنَا بِمَا كُنَّا بِهٖ مُشۡرِكِيۡنَ ﴿٨٥﴾

85. තවද, ඔවුන් අපගේ දඬුවම දුටු විට ඔවුන්, 'අපි එකම අල්ලාහ් කෙරෙහිම විශ්වාස කරන්නෙමු. තවද, අප ඔහුට සමාන තබමින් සිටි සියළු දේ අපි ප්‍රතික්ෂේප කරන්නෙමු'යි කීහ.

فَلَمۡ يَكُ يَنۡفَعُهُمۡ اِيۡمَانُهُمۡ لَمَّا رَاَوۡا بَاۡسَنَا‌ؕ سُنَّتَ اللّٰهِ الَّتِىۡ قَدۡ خَلَتۡ فِىۡ عِبَادِهٖ‌ۚ وَخَسِرَ هُنَالِكَ الۡكٰفِرُوۡنَ ﴿٨٦﴾

86. නමුත් ඔවුන් අපගේ දඬුවම දුටු විට (එවෙලෙහි) ඔවුන්ගේ විශ්වාසය කිසිදු ඵලක් නොවීය. මෙය ඔහුගේ දාසයින් සම්බන්ධයෙන් (නිරතුරුවම) සිදුවන්නාවූ අල්ලාහ්ගේ නීතිය වේ. තවද, අවිශ්වාසීතයින් විනාශයට පත් වූයේ මෙලෙසය.



හා මීම් සජදහ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ۝٢

2. හා මීම්◆.

تَنۡزِيۡلٌ مِّنَ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝٣

3. (මෙය) මහා කාරුණික, පරම දයාබරයාණන්ගෙන් පහළ වූවකි.

كِتٰبٌ فُصِّلَتۡ اٰيٰتُهٗ قُرۡاٰنًا عَرَبِيًّا لِّقَوۡمٍ يَّعۡلَمُوۡنَ ۝٤

4. ග්‍රන්ථයකි, මෙහි වාක්‍යයන් සවිස්තරාත්මකව විග්‍රහ කරන ලද්දේය. යළි යළි පාරායනා කරනු ලබන (මෙන්ම මෙහි භාෂාව) හුදු කරුණු පැහැදිලි කරන්නාවූ එකකි. නුවණැති ජනතාව වෙනුවෙන්ය.

بَشِيۡرًا وَّنَذِيۡرًا ۚ فَاَعۡرَضَ اَكۡثَرُهُمۡ فَهُمۡ لَا يَسۡمَعُوۡنَ ۝٥

5. ශුභාරංචිය ගෙන එන්නක් සහ අවවාද කරන්නක්ය. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය ඉවත හැරෙන්නෝය. තවද ඔවුන් නොඅසන්නෝය.

وَقَالُوۡا قُلُوۡبُنَا فِىۡۤ اَكِنَّةٍ مِّمَّا تَدۡعُوۡنَاۤ اِلَيۡهِ وَفِىۡۤ اٰذَانِنَا وَقۡرٌ وَّمِنۡۢ بَيۡنِنَا وَبَيۡنِكَ حِجَابٌ فَاعۡمَلۡ اِنَّنَا عٰمِلُوۡنَ ۝٦

6. තවද ඔවුහු, 'නුඹ කුමන දේ වෙත අපව කැඳවන්නේද එයට එරෙහිව අපගේ හදවත් ආවරණයන් තුල(සුරක්ෂිත)ය. තවද අපගේ කන්හි බිහිරිභාවයද ඇත. තවද අප සහ ඔබ අතර තිරයක් ඇත. එබැවින් ඔබ (ඔබගේ ක්‍රියාව) කරගෙන යන්න. අපිද ක්‍රියා කරන්නෙමු'යි පවසති.

قُلۡ اِنَّمَاۤ اَنَا بَشَرٌ مِّثۡلُكُمۡ يُوۡحٰۤى اِلَىَّ اَنَّمَاۤ اِلٰهُكُمۡ اِلٰهٌ وَّاحِدٌ فَاسۡتَقِيۡمُوۡۤا اِلَيۡهِ وَاسۡتَغۡفِرُوۡهُ ؕ وَوَيۡلٌ لِّلۡمُشۡرِكِيۡنَ ۝٧

7. පවසන්න, 'මම නුඹලා වැනි මිනිසෙක්ම වෙමි. නුඹලාගේ නැමදීමට සුදුසු දෙවියන් එකම දෙවියන් යැයි මා වෙත අනාවරණය කරනු ලැබ ඇත. එබැවින් නුඹලා (ඉවත නොහැරී) ඔහු වෙත සෘජුව නිරත වනු. තවද ඔහුගෙන් ක්ෂමාව අයැදිනු' තවද ප්‍රතිමා පුදන්නන්හට විපතකි.

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

8. ඔවුන් zසකාත්(දුගිබද්ද) නොගෙවන්නෝය. තවද පරලොව ප්‍රතික්ෂේප කරන්නන් ඔවුහුමය.

الَّذِينَ لَا يُؤْتُونَ الزَّكٰوةَ وَهُمْ بِالْاٰخِرَةِ هُمْ كٰفِرُونَ ۝٨

9. නියතවශයෙන්ම විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අය ගත්කල ඔවුනට කිසිසේත් නිම නොවන්නාවූ තිළිණයක් ලැබෙනු ඇත.

إِنَّ الَّذِينَ اٰمَنُوا وَعَمِلُوا الصّٰلِحٰتِ لَهُمْ أَجْرٌ غَيْرُ مَمْنُونٍ ۝٩ ع

10. පවසන්න, 'කාල අවධියන් දෙකකදී පොළොව මැවූ ඔහුව නුඹලා ඇත්තෙන්ම අවිශ්වාස කරන්නෙහුද? තවද නුඹලා ඔහුට සමානයන් තබන්නෙහුද?' සර්ව ලෝකයන්ට අධිපතියාණන් එවැන්නාය.

قُلْ أَئِنَّكُمْ لَتَكْفُرُونَ بِالَّذِي خَلَقَ الْأَرْضَ فِي يَوْمَيْنِ وَتَجْعَلُونَ لَهُ أَنْدَادًا ۚ ذٰلِكَ رَبُّ الْعٰلَمِينَ ۝١٠

11. ඔහු එහි මතුපිට ස්ථිරසාර කඳු පිහිටුවූයේය. තවද ඔහු එහි ආශිර්වාදයන් පිරිනැමුවේය. තවද එහි පරිභෝගයට අවශ්‍ය දේ කාල අවධියන් සතරකදී සමතුලනය කළේය. ඉල්ලන්නන් සියල්ලටම එය එක හා සමානය.

وَجَعَلَ فِيهَا رَوَاسِيَ مِنْ فَوْقِهَا وَبٰرَكَ فِيهَا وَقَدَّرَ فِيهَا أَقْوَاتَهَا فِي أَرْبَعَةِ أَيَّامٍ ۚ سَوَاءً لِلسَّائِلِينَ ۝١١

12. පසුව, ඔහු අහස දෙසට හැරුණේය. තවද එය දුමාරයක් ලෙස තිබුණේය. තවද එයටද පොළොවටද 'නුඹලා දෙදෙනා කැමැත්තෙන් හෝ අකමැත්තෙන් පැමිණෙනු'යි පැවසුවේය. ඒවා, 'අපි කැමැත්තෙන් පැමිණියෙමු'යි කීය.

ثُمَّ اسْتَوٰى إِلَى السَّمَاءِ وَهِيَ دُخَانٌ فَقَالَ لَهَا وَلِلْأَرْضِ ائْتِيَا طَوْعًا أَوْ كَرْهًا ۚ قَالَتَا أَتَيْنَا طَائِعِينَ ۝١٢

13. එබැවින් ඔහු ඒවා අහස් සතක් වශයෙන් කාල අවධි දෙකකදී නිමා කළේය. තවද සෑම අහස් වෙතම ඒවායෙහි කාර්යය අනාවරණය කළේය. තවද අපි පහළම අහස (ආලෝකය සඳහාද) ආරක්ෂාව සඳහාද පහන් වලින් අලංකාර කළෙමු. බලසම්පන්න මෙන්ම සියල්ල දත්තාගේ නියමය වනුයේ එයයි.

فَقَضٰىهُنَّ سَبْعَ سَمٰوَاتٍ فِي يَوْمَيْنِ وَأَوْحٰى فِي كُلِّ سَمَاءٍ أَمْرَهَا ۚ وَزَيَّنَّا السَّمَاءَ الدُّنْيَا بِمَصَابِيحَ ۖ وَحِفْظًا ۚ ذٰلِكَ تَقْدِيرُ الْعَزِيزِ الْعَلِيمِ ۝١٣

فَاِنْ اَعْرَضُوْا فَقُلْ اَنْذَرْتُكُمْ صٰعِقَةً مِّثْلَ صٰعِقَةِ عَادٍ وَّثَمُوْدَ ﴿١٤﴾

14. නමුත් ඔවුන් ඉවත හැරෙන්නේ නම් එවිට පවසන්න, 'ආද් සහ සමූද්ට (අත්වූ) දඬුවම මෙන් විනාශකාරී දඬුවමක් ගැන මම නුඹලාට අනතුරු අඟවන්නෙමි'.

اِذْ جَآءَتْهُمُ الرُّسُلُ مِنْۢ بَيْنِ اَيْدِيْهِمْ وَمِنْ خَلْفِهِمْ اَلَّا تَعْبُدُوْٓا اِلَّا اللّٰهَ ؕ قَالُوْا لَوْ شَآءَ رَبُّنَا لَاَنْزَلَ مَلٰٓئِكَةً فَاِنَّا بِمَآ اُرْسِلْتُمْ بِهٖ كٰفِرُوْنَ ﴿١٥﴾

15. ඔවුන්ගේ දූතයින් ඔවුන්ගේ ඉදිරියෙන් සහ ඔවුන්ගේ පිටුපසින් ඔවුන් වෙත පැමිණ, 'අල්ලාහ් හැර කිසිවෙකුත් නොනමදිනු'(යි කියූ) කල්හි ඔවුන්, 'අපගේ අධිපතියාණන් (එසේ) අභිමත වූයේ නම් නිශ්චිතවම ඔහු සුරදූතයින් පහළ කරන්නට තිබුණි. එබැවින් ඔබ සමග එවන ලද දේ කෙරෙහි අපි අවිශ්වාස කරමු'යි කීහ.

فَاَمَّا عَادٌ فَاسْتَكْبَرُوْا فِى الْاَرْضِ بِغَيْرِ الْحَقِّ وَقَالُوْا مَنْ اَشَدُّ مِنَّا قُوَّةً ؕ اَوَلَمْ يَرَوْا اَنَّ اللّٰهَ الَّذِىْ خَلَقَهُمْ هُوَ اَشَدُّ مِنْهُمْ قُوَّةً ؕ وَكَانُوْا بِاٰيٰتِنَا يَجْحَدُوْنَ ﴿١٦﴾

16. ආද් (සමූහය) ගත්කල ඔවුන් පොළොවෙහි කිසිදු යුක්තියකින් තොරව උඩඟු ලෙස හැසිරෙමින්, 'අපට වඩා බලයෙන් ශක්තිමත් වන්නේ කවුරුන්ද.?'යි පැවසූහ. ඔවුන්ව මැවූ අල්ලාහ් ඔවුන්ට වඩා බලයෙන් ශක්තිසම්පන්න බව ඔවුන් නොදකින්නේද? එවිට ඔවුන් අපගේ සළකුණු නොකඩවා ප්‍රතික්ෂේප කරන්නට වූහ.

فَاَرْسَلْنَا عَلَيْهِمْ رِيْحًا صَرْصَرًا فِىْٓ اَيَّامٍ نَّحِسَاتٍ لِّنُذِيْقَهُمْ عَذَابَ الْخِزْىِ فِى الْحَيٰوةِ الدُّنْيَا ؕ وَلَعَذَابُ الْاٰخِرَةِ اَخْزٰى وَهُمْ لَا يُنْصَرُوْنَ ﴿١٧﴾

17. එබැවින් ඔවුන් මෙලොව ජීවිතයෙහි නින්දිත දඬුවම විඳිනු පිණිස විවිධ අශුභ නිමිති දිනයන්හි බිහිසුණු කුණාටුවක් අපි ඔවුන් මත එව්වෙමු. එමෙන්ම පරලොව දඬුවම නියතවශයෙන්ම වඩා නින්දිත වනු ඇත. තවද ඔවුන් උදව් කරනු නොලබන්නෝය.

وَاَمَّا ثَمُوْدُ فَهَدَيْنٰهُمْ فَاسْتَحَبُّوا الْعَمٰى عَلَى الْهُدٰى فَاَخَذَتْهُمْ صٰعِقَةُ الْعَذَابِ الْهُوْنِ بِمَا كَانُوْا يَكْسِبُوْنَ ﴿١٨﴾

18. තවද සමූද් (සමූහය) ගත්කල ඔවුනට අපි යහමග දුන්නෙමු. නමුත් ඔවුන් යහමගට වඩා අන්ධභාවයට ප්‍රමුඛත්වය දුන්හ. එබැවින් ඔවුන් ඉපැයූ දේ හේතුවෙන් නින්දිත දඬුවමක මහා විපත්තිය ඔවුන්ව හසුකරගත්තේය.

وَنَجَّيۡنَا الَّذِيۡنَ اٰمَنُوۡا وَكَانُوۡا يَتَّقُوۡنَ ﴿١٩﴾

19. තවද, විශ්වාස කොට බිය බැතිමත්ව ක්‍රියා කළ අයව අපි බේරා ගත්තෙමු.

وَيَوۡمَ يُحۡشَرُ اَعۡدَآءُ اللّٰهِ اِلَى النَّارِ فَهُمۡ يُوۡزَعُوۡنَ ﴿٢٠﴾

20. තවද, අල්ලාහ්ගේ සතුරන්ව ගින්න වෙතට එක්රැස් කරන දිනයේදී ඔවුන් කණ්ඩායම් වශයෙන් බෙදනු ලබන්නෝය.

حَتّٰٓى اِذَا مَا جَآءُوۡهَا شَهِدَ عَلَيۡهِمۡ سَمۡعُهُمۡ وَاَبۡصَارُهُمۡ وَجُلُوۡدُهُمۡ بِمَا كَانُوۡا يَعۡمَلُوۡنَ ﴿٢١﴾

21. ඔවුන් එයට ලඟාවෙන කල්හි ඔවුන්ගේ කන් ද ඔවුන්ගේ ඇස් ද ඔවුන්ගේ සම් ද ඔවුන් කරමින් සිටි දේ ගැන ඔවුනට එරෙහිව සාක්ෂි දරනු ඇත.

وَقَالُوۡا لِجُلُوۡدِهِمۡ لِمَ شَهِدْتُّمۡ عَلَيۡنَا ؕ قَالُوۡۤا اَنۡطَقَنَا اللّٰهُ الَّذِىۡۤ اَنۡطَقَ كُلَّ شَىۡءٍ وَّهُوَ خَلَقَكُمۡ اَوَّلَ مَرَّةٍ وَّاِلَيۡهِ تُرۡجَعُوۡنَ ﴿٢٢﴾

22. තවද, ඔවුන් තමන්ගේ සම් වෙතට, 'නුඹලා අපට එරෙහිව සාක්ෂි දෙන්නේ මන්දැ?'යි කියන්නෝය. එයට ඒවා, 'සියල්ලව කතා කිරීමට සැලැස්වූ අල්ලාහ්ම අපවද කතා කිරීමට සැලැස්වූයේය. තවද, නුඹලාව පළමු වතාවට මැවූවේ ඔහුමය. තවද, නුඹලා ඔහු වෙතටම ආපසු ගෙන එනු ලබන්නෙහුයැ'යි පිළිතුරු දෙනු ඇත.

وَمَا كُنۡتُمۡ تَسۡتَتِرُوۡنَ اَنۡ يَّشۡهَدَ عَلَيۡكُمۡ سَمۡعُكُمۡ وَلَاۤ اَبۡصَارُكُمۡ وَلَا جُلُوۡدُكُمۡ وَلٰكِنۡ ظَنَنۡتُمۡ اَنَّ اللّٰهَ لَا يَعۡلَمُ كَثِيۡرًا مِّمَّا تَعۡمَلُوۡنَ ﴿٢٣﴾

23. 'තවද, නුඹලා (පව් කරන විට) නුඹලාගේ කන් ද නුඹලාගේ ඇස් ද නුඹලාගේ සම් ද නුඹලාට එරෙහිව සාක්ෂි දරනු ඇතැයි නුඹලා බිය නොවූයෙහුය. එනමුත් නුඹලා කරමින් සිටි බොහෝ දේ ගැන අල්ලාහ්ද නොදැන සිටියේ යැයි නුඹලා සිතුවෙහුය'.

وَذٰلِكُمۡ ظَنُّكُمُ الَّذِىۡ ظَنَنۡتُمۡ بِرَبِّكُمۡ اَرۡدٰٮكُمۡ فَاَصۡبَحۡتُمۡ مِّنَ الۡخٰسِرِيۡنَ ﴿٢٤﴾

24. 'තවද, නුඹලාගේ අධිපතියාණන් සම්බන්ධව නුඹලා සිතෙහි තැබූ නුඹලාගේ ආකල්ප නුඹලාව විනාශයට පත් කළේය. එබැවින් නුඹලා (දැන්) පාඩු විඳින්නන්ගෙන් වී ඇත්තෙහුය'.

فَاِنْ يَّصْبِرُوْا فَالنَّارُ مَثْوًى لَّهُمْ ۚ وَاِنْ يَّسْتَعْتِبُوْا فَمَا هُمْ مِّنَ الْمُعْتَبِيْنَ ﴿٢٥﴾

25. එහෙයින් ඔවුනට ඉවසිය හැකි නම්, ඔවුන්ගේ වාසස්ථානය ගින්න වේ. තවද ඔවුන් නිදහසට කරුණු දැක්වීමට කැමතිවුවද ඔවුන්ට නිදහසට කරුණු දැක්වීමේ අවස්ථාව දෙනු නොලබන්නේය.

وَقَيَّضْنَا لَهُمْ قُرَنَآءَ فَزَيَّنُوْا لَهُمْ مَّا بَيْنَ اَيْدِيْهِمْ وَمَا خَلْفَهُمْ وَحَقَّ عَلَيْهِمُ الْقَوْلُ فِيْٓ اُمَمٍ قَدْ خَلَتْ مِنْ قَبْلِهِمْ مِّنَ الْجِنِّ وَالْاِنْسِ ۚ اِنَّهُمْ كَانُوْا خٰسِرِيْنَ ﴿٢٦﴾

26. තවද ඔවුන්ට ඉදිරියේ ඇති දේ මෙන්ම ඔවුන්ට පෙර වූ දේ ඔවුනට ආකර්ෂණමත් කරවන සගයින්ව අපි ඔවුනට නියම කර ඇත්තෙමු. තවද ඔවුනට පෙර වූ පිත් හා මිනිස් සමාජයන්ට එරෙහි වූ එම තීන්දුවම ඔවුන්ටද සැබෑ විය. නියතවශයෙන්ම පාඩු විඳින්නන් ඔවුන්මය.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا لَا تَسْمَعُوْا لِهٰذَا الْقُرْاٰنِ وَالْغَوْا فِيْهِ لَعَلَّكُمْ تَغْلِبُوْنَ ﴿٢٧﴾

27. තවද අවිශ්වාසිත අය, 'මෙම කුර්ආනයට සවන් නොදෙනු. නමුත් නුඹලා අභිබවා යනු පිණිස එය (පාරායනා කරනු ලබන) විටදී ඝෝෂා කරනු'යි කියති.

فَلَنُذِيْقَنَّ الَّذِيْنَ كَفَرُوْا عَذَابًا شَدِيْدًا ۙ وَّلَنَجْزِيَنَّهُمْ اَسْوَاَ الَّذِيْ كَانُوْا يَعْمَلُوْنَ ﴿٢٨﴾

28. තවද නිශ්චිතවම අපි අවිශ්වාසිත අයහට බරපතල දඬුවමක් විඳීමට සලස්වන්නෙමු. තවද නිශ්චිතවම අපි ඔවුන්ගේ දැඩි නපුරු ක්‍රියාවන්ට ප්‍රතිවිපාක දෙන්නෙමු.

ذٰلِكَ جَزَآءُ اَعْدَآءِ اللّٰهِ النَّارُ ۚ لَهُمْ فِيْهَا دَارُ الْخُلْدِ ؕ جَزَآءًۢ بِمَا كَانُوْا بِاٰيٰتِنَا يَجْحَدُوْنَ ﴿٢٩﴾

29. එම ගින්න අල්ලාහ්ගේ සතුරන් සඳහා තිළිණය වේ. ඔවුන් අපගේ සළකුණු ප්‍රතික්ෂේප කරමින් සිටි බැවින් ඔවුන් සඳහා එහි ප්‍රතිවිපාකය වශයෙන් දීර්ඝකාලීන වාසස්ථානයක් ඇත.

وَقَالَ الَّذِيْنَ كَفَرُوْا رَبَّنَآ اَرِنَا الَّذَيْنِ اَضَلّٰنَا مِنَ الْجِنِّ وَالْاِنْسِ نَجْعَلْهُمَا

30. තවද අවිශ්වාසිත අය, 'අපගේ අධිපතියාණෙනි! පිත්වරුන් සහ මිනිසුන් වන දෙදෙනා අතුරින් අපව නොමග යැවූ අයව, අප ඔවුන් දෙදෙනා අපගේ පාදයන් යට මිරිකාදමනු පිණිසත් ඔවුන් දෙදෙනා

تَحْتَ اَقْدَامِنَا لِيَكُوْنَا مِنَ الْاَسْفَلِيْنَ ۝٣٠

ඉතාමත් නිචයින්ගෙන් වනු පිණිසත් ඔවුන්ව අපහට පෙන්වා දෙනු මැනවැ'යි කියති.

اِنَّ الَّذِيْنَ قَالُوْا رَبُّنَا اللّٰهُ ثُمَّ اسْتَقَامُوْا تَتَنَزَّلُ عَلَيْهِمُ الْمَلٰٓئِكَةُ اَلَّا تَخَافُوْا وَلَا تَحْزَنُوْا وَاَبْشِرُوْا بِالْجَنَّةِ الَّتِىْ كُنْتُمْ تُوْعَدُوْنَ ۝٣١

31. 'අපගේ අධිපතියාණන් අල්ලාහ්යැ'යි පවසා ස්ථිරසාරව සිටින අය ගත්කල සුර දූතයින් ඔවුන් මත (මෙසේ පවසමින්) පහළ වෙති. 'නුඹලා බිය නොවනු. ශෝක නොවනු. තවද නුඹලාට පොරොන්දු වූ ස්වර්ගය ගැන ප්‍රීති වනු'.

نَحْنُ اَوْلِيٰٓؤُكُمْ فِى الْحَيٰوةِ الدُّنْيَا وَفِى الْاٰخِرَةِ ۚ وَلَكُمْ فِيْهَا مَا تَشْتَهِىْٓ اَنْفُسُكُمْ وَلَكُمْ فِيْهَا مَا تَدَّعُوْنَ ۝٣٢

32. 'අපි මෙලොවෙහිදීද පරලොවෙහිදීද නුඹලාගේ මිතුරන් වන්නෙමු. එහි නුඹලාගේ ආත්මයන් පතන සියල්ල නුඹලාට ලැබෙනු ඇත. තවද නුඹලා ඉල්ලන සියළු දේද එහිදී නුඹලාට ලැබෙනු ඇත'.

نُزُلًا مِّنْ غَفُوْرٍ رَّحِيْمٍ ۝٣٣ ع

33. 'මෙය අතිශයින්ම ක්ෂමාන්විත මෙන්ම පරම දයාබරයාණන්ගෙන් වන සත්කාරයකි'

وَمَنْ اَحْسَنُ قَوْلًا مِّمَّنْ دَعَآ اِلَى اللّٰهِ وَعَمِلَ صَالِحًا وَّقَالَ اِنَّنِىْ مِنَ الْمُسْلِمِيْنَ ۝٣٤

34. අල්ලාහ් වෙත (මිනිසුන්ව) කැඳවා යහපත් ක්‍රියා ඉටු කර, 'මම නියතවශයෙන්ම අවනතවන්නන්ගෙන් වෙමි'යි පවසන්නෙකුට වඩා කථාවෙහි විශිෂ්ඨ වන්නේ අන් කවරෙක්ද?

وَلَا تَسْتَوِى الْحَسَنَةُ وَلَا السَّيِّئَةُ ۗ اِدْفَعْ بِالَّتِىْ هِىَ اَحْسَنُ فَاِذَا الَّذِىْ بَيْنَكَ وَبَيْنَهٗ عَدَاوَةٌ كَاَنَّهٗ وَلِىٌّ حَمِيْمٌ ۝٣٥

35. තවද හොඳ සහ නරක එක හා සමාන නොවේ. ඉතා යහපත් දෙයින් (නපුර) පලවා හරින්න. එසැනින්ම, කවරෙකු සහ ඔබ අතර සතුරුකමක් වුයේද ඔහු ස්නේහවත් මිතුරෙකු මෙන් වනු ඇත.

وَمَا يُلَقّٰىهَآ اِلَّا الَّذِيْنَ صَبَرُوْا ۚ وَمَا يُلَقّٰىهَآ اِلَّا ذُوْ حَظٍّ عَظِيْمٍ ۝٣٦

36. ඉවසිලිමත්වන්නන්ට හැර අන් කිසිවෙකුටත් එම අවස්ථාව නොලැබෙනු ඇත. තවද (යහකමේ) විශාල කොටසක් හිමි අයට මිස අන් කිසිවෙකුටත් එම අවස්ථාව නොලැබෙනු ඇත.

37. තවද ෂෙයිතාන් වෙතින් යම් පෙළඹවීමක් ඔබව පොළඹවන්නේ නම්, එවිට ඔබ අල්ලාහ්ගෙන් සරණ පතන්න. නියතවශයෙන්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දන්නාය.

وَاِمَّا يَنْزَغَنَّكَ مِنَ الشَّيْطٰنِ نَزْغٌ فَاسْتَعِذْ بِاللّٰهِ ؕ اِنَّهٗ هُوَ السَّمِيْعُ الْعَلِيْمُ ﴿٣٧﴾

38. එමෙන්ම රාත්‍රියද දහවලද හිරුද සඳුද ඔහුගේ සළකුණු අතරින්ය. හිරුටද සඳුටද යටහත් පහත්ව නොවඳිනු. නමුත් ඒවා මැවූ අල්ලාහ්ටම නුඹලා යටහත් පහත්ව නමදිනු. නුඹලා (ඇත්තෙන්ම) ඔහුටම නමදින්නේ නම් (එසේ කරනු).

وَمِنْ اٰيٰتِهِ الَّيْلُ وَالنَّهَارُ وَالشَّمْسُ وَالْقَمَرُ ؕ لَا تَسْجُدُوْا لِلشَّمْسِ وَلَا لِلْقَمَرِ وَاسْجُدُوْا لِلّٰهِ الَّذِيْ خَلَقَهُنَّ اِنْ كُنْتُمْ اِيَّاهُ تَعْبُدُوْنَ ﴿٣٨﴾

39. නමුත් ඔවුන් ගර්වයෙන් යුතුව ඉවත හැරෙන්නේ නම් (එය ඔවුන්ගේම විනාශය පිණිස ඔවුන් කරන්නෝය). නමුත් ඔබගේ අධිපතියාණන් සමග සිටින්නන්, රාත්‍රියෙහිද දවාලෙහිද ඔහුව සුවිශුද්ධ කරන්නෝය. තවද ඔවුන් කිසිවිටෙකත් විඩාවට පත් නොවන්නෝය.

فَاِنِ اسْتَكْبَرُوْا فَالَّذِيْنَ عِنْدَ رَبِّكَ يُسَبِّحُوْنَ لَهٗ بِالَّيْلِ وَالنَّهَارِ وَهُمْ لَا يَسْـَٔمُوْنَ ﴿٣٩﴾ ۩ السجدة

40. තවද ඔහුගේ සළකුණු අතරින් (මෙය)ද වේ. එනම් පොළොව වියළී ගොස් තිබෙනු ඔබ දකින්නෙහිය. නමුත් අප එය මත ජලය පහළ කළ කල්හි එය ප්‍රබෝධමත් වී (හරිත ශාක වලින්) සරුසාරවන්නේය. නියත වශයෙන්ම එයට ජීවය දුන් ඔහුට මළවුන්ටද ජීවය දිය හැකිය. සැබැවින්ම ඔහුට සියළු දේ කෙරෙහි බලය ඇත.

وَمِنْ اٰيٰتِهٖۤ اَنَّكَ تَرَى الْاَرْضَ خَاشِعَةً فَاِذَاۤ اَنْزَلْنَا عَلَيْهَا الْمَآءَ اهْتَزَّتْ وَرَبَتْ ؕ اِنَّ الَّذِيْۤ اَحْيَاهَا لَمُحْيِ الْمَوْتٰى ؕ اِنَّهٗ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿٤٠﴾

41. නියතවශයෙන්ම අපගේ වදන් විකෘති මගට යොමු කරන අය අපගෙන් සැඟවී නොමැත. එසේනම්, වඩා ශ්‍රේෂ්ඨ වන්නේ ගින්නෙහි හෙළනු ලබන්නාද, නැතහොත් පුනරුත්ථාන දිනයේදී ආරක්ෂිතව පැමිණෙන්නාද? නුඹලා අභිමත දේ

اِنَّ الَّذِيْنَ يُلْحِدُوْنَ فِيْۤ اٰيٰتِنَا لَا يَخْفَوْنَ عَلَيْنَا ؕ اَفَمَنْ يُّلْقٰى فِي النَّارِ خَيْرٌ اَمْ مَّنْ يَّاْتِيْۤ اٰمِنًا يَّوْمَ الْقِيٰمَةِ ؕ اِعْمَلُوْا مَا شِئْتُمْ ۙ

| | |
|---|---|
| කරනු. නියතවශයෙන්ම නුඹලා කරන සියළු දේ ඔහු දකින්නේය. | اِنَّهٗ بِمَا تَعۡمَلُوۡنَ بَصِيۡرٌ ۝٤١ |
| 42. සිහිපත් කරවීම ඔවුන් වෙත පැමිණි විට එය අවිශ්වාස කරන අය (පාඩු විඳින්නන්ය). තවද ඇත්තෙන්ම එය ගෞරවාන්විත ග්‍රන්ථයකි. | اِنَّ الَّذِيۡنَ كَفَرُوۡا بِالذِّكۡرِ لَمَّا جَآءَهُمۡ ۚ وَاِنَّهٗ لَكِتٰبٌ عَزِيۡزٌ ۝٤٢ |
| 43. එයට ඉදිරියෙන් හෝ එයට පිටුපසින් මුසාව එය වෙත ළඟාවිය නොහැක. (එය) ප්‍රඥාසම්පන්න මෙන්ම ප්‍රසංශා හිමියාණන්ගෙන් පහළ වූවකි. | لَّا يَاۡتِيۡهِ الۡبَاطِلُ مِنۡۢ بَيۡنِ يَدَيۡهِ وَلَا مِنۡ خَلۡفِهٖ ؕ تَنۡزِيۡلٌ مِّنۡ حَكِيۡمٍ حَمِيۡدٍ ۝٤٣ |
| 44. ඔබට පෙර වූ දූතයින්ට පවසනු ලැබූ දේ මිස අන් කිසිවක් ඔබට නොපවසනු ලබන්නේය. ඇත්තෙන්ම ඔබගේ අධිපතියාණන් සමාව දීමේ හිමිකම ඇත්තාය. තවද වේදනීය දඬුවම් දීමේ බලය ඇත්තාය. | مَا يُقَالُ لَكَ اِلَّا مَا قَدۡ قِيۡلَ لِلرُّسُلِ مِنۡ قَبۡلِكَ ؕ اِنَّ رَبَّكَ لَذُوۡ مَغۡفِرَةٍ وَّذُوۡ عِقَابٍ اَلِيۡمٍ ۝٤٤ |
| 45. තවද අප මෙම කුර්ආනය පිටස්තර බසකින් කළේ නම්, නියතවශයෙන්ම ඔවුන්, 'මෙහි වාක්‍යයන් විග්‍රහ නොකරන ලද්දේ මන්ද? කිමද! (ධර්මය) පිටස්තර බසක් සහ (වක්තෘ) අරාබියෙක්දැ?'යි පවසන්නට තිබුණි. පවසන්න, 'විශ්වාසිත අයහට මෙය මග පෙන්වීමක්ද නිවාරණයක්ද වන්නේය'. නමුත් විශ්වාස නොකරන අය ගත්කල ඔවුන්ගේ කන්හි බිහිරිභාවයකි. එමෙන්ම එය ඔවුන්හට සැඟවුණු එකක්ය. ඔවුන් දුරස්ථ තැන සිට කැඳවනු (ලබන්නන්) මෙන්ය. | وَلَوۡ جَعَلۡنٰهُ قُرۡاٰنًا اَعۡجَمِيًّا لَّقَالُوۡا لَوۡلَا فُصِّلَتۡ اٰيٰتُهٗ ؕ ءَاَعۡجَمِىٌّ وَّعَرَبِىٌّ ؕ قُلۡ هُوَ لِلَّذِيۡنَ اٰمَنُوۡا هُدًى وَّشِفَآءٌ ؕ وَالَّذِيۡنَ لَا يُؤۡمِنُوۡنَ فِىۡۤ اٰذَانِهِمۡ وَقۡرٌ وَّهُوَ عَلَيۡهِمۡ عَمًى ؕ اُولٰٓئِكَ يُنَادَوۡنَ مِنۡ مَّكَانٍۢ بَعِيۡدٍ ۝٤٥ |
| 46. තවද අපි සැබැවින්ම මූසාට පුස්තකය දුන්නෙමු. එහෙත් එය පිළිබඳව මතභේදයන් හට ගැණින. තවද ඔබගේ අධිපතියාණන් වෙතින් පෙර දුන් වචනයක් නොවූයේ නම් (මෙම කටයුත්ත) ඔවුනතර තීරණය වන්නට තිබුණි. තවද නිශ්චිතවම ඔවුන් එය පිළිබඳව නොසැනසිල්ලක් ඇති කරන්නාවූ සැකයෙහි පසුවෙති. | وَلَقَدۡ اٰتَيۡنَا مُوۡسَى الۡكِتٰبَ فَاخۡتُلِفَ فِيۡهِ ؕ وَلَوۡلَا كَلِمَةٌ سَبَقَتۡ مِنۡ رَّبِّكَ لَقُضِىَ بَيۡنَهُمۡ ؕ وَاِنَّهُمۡ لَفِىۡ شَكٍّ مِّنۡهُ مُرِيۡبٍ ۝٤٦ |

مَنْ عَمِلَ صَالِحًا فَلِنَفْسِهِۦ ۖ وَمَنْ أَسَآءَ فَعَلَيْهَا ۗ وَمَا رَبُّكَ بِظَلَّٰمٍ لِّلْعَبِيدِ ﴿٤٧﴾

47. කවරෙකු හෝ යහකම් කරන්නේද එය ඔහුගේම ආත්මය සඳහා වේ. එසේම කවරෙකු හෝ නපුරක් කරන්නේ නම් එය ඔහුට එරෙහිවමය. තවද ඔබගේ අධිපතියාණන් (ඔහුගේ) දාසයින්ට කිසිසේත්ම අසාධාරණ කරන්නෙක් නොවේ.

الجزء ٢٥

إِلَيْهِ يُرَدُّ عِلْمُ ٱلسَّاعَةِ ۚ وَمَا تَخْرُجُ مِن ثَمَرَٰتٍ مِّنْ أَكْمَامِهَا وَمَا تَحْمِلُ مِنْ أُنثَىٰ وَلَا تَضَعُ إِلَّا بِعِلْمِهِۦ ۚ وَيَوْمَ يُنَادِيهِمْ أَيْنَ شُرَكَآءِى قَالُوٓا۟ ءَاذَنَّٰكَ مَا مِنَّا مِن شَهِيدٍ ﴿٤٨﴾

25-කොටස

48. ඔහු වෙතටම එම හෝරාවේ දැනුම යොමු කරනු ලබන්නේය. තවද ඔහුගේ දැනුමෙන් තොරව කිසිදු පළතුරු ඒවායේ කෝෂවලින් හට නොගන්නේය. එමෙන්ම කිසිම ස්ත්‍රියක් (දරු) පිළිසිඳ ගන්නේද නැත. එමෙන්ම ජනිත කරන්නේද නැත. තවද එදින, 'මාහට සමාන තැබූ හවුල් කරුවන් කොහේදෑ?'යි (පවසමින්) ඔහු, ඔවුන්ව කැඳවන්නේය. එයට ඔවුන් 'අප අතර සාක්ෂි වශයෙන් කිසිවෙක් නොවන්නේයැයි අපි ඔබ වෙත ප්‍රකාශ කර සිටිමු'යි පවසන්නෝය.

وَضَلَّ عَنْهُم مَّا كَانُوا۟ يَدْعُونَ مِن قَبْلُ ۖ وَظَنُّوا۟ مَا لَهُم مِّن مَّحِيصٍ ﴿٤٩﴾

49. තවද පෙර ඔවුන් කැඳවමින් සිටි සියල්ලම ඔවුන්ට නැති වී යනු ඇත. පසුව කිසිදු ගැලවීමක් නැතැයි ඔවුනට වැටහී යනු ඇත.

لَّا يَسْـَٔمُ ٱلْإِنسَٰنُ مِن دُعَآءِ ٱلْخَيْرِ وَإِن مَّسَّهُ ٱلشَّرُّ فَيَـُٔوسٌ قَنُوطٌ ﴿٥٠﴾

50. මිනිසා යහපත අයැදීමෙහි වෙහෙසට පත් නොවන්නේය. නමුත් නපුරක් ඔහුට අත් වුවහොත් ඔහු අධෛර්යමත් වී බලාපොරොත්තු සුන්කර ගන්නේය.

وَلَئِنْ أَذَقْنَٰهُ رَحْمَةً مِّنَّا مِنۢ بَعْدِ ضَرَّآءَ مَسَّتْهُ لَيَقُولَنَّ هَٰذَا لِى وَمَآ أَظُنُّ ٱلسَّاعَةَ قَآئِمَةً وَلَئِن رُّجِعْتُ إِلَىٰ رَبِّىٓ إِنَّ لِى عِندَهُۥ لَلْحُسْنَىٰ ۚ فَلَنُنَبِّئَنَّ ٱلَّذِينَ

51. නමුත් (ඇතැම්) විපත් ඔහුට අත් වුවායින් පසු අප වෙතින් දයාව ඔහුට විඳින්නට සැලැස්වූ විට නියතවශයෙන්ම ඔහු, 'මෙය මට ලැබිය යුතු දෙයකි. තවද මෙම හෝරාව පැමිණෙන්නේයැයි මා කිසිවිටෙකත් සිතුවේ නැත. නමුත් මාගේ අධිපතියාණන් වෙතට මා ආපසු පමුණුවනු ලැබුවහොත් මා නියතවශයෙන්ම ඔහුගෙන් ඉතා

විශිෂ්ඨ දේ ලබන්නෙමි'යි පවසන්නේය. පසුව නියතවශයෙන්ම අපි අවිශ්වාසිත අයහට ඔවුන් කළ සියළු දේ ගැන පවසන්නෙමු. තවද අපි නිශ්චිතවම ඔවුන්ට දැඩි දඬුවමක් විඳීමට සලස්වන්නෙමු.

كَفَرُوْا بِمَا عَمِلُوْا ۙ وَلَنُذِيْقَنَّهُمْ مِّنْ عَذَابٍ غَلِيْظٍ ﴿٥١﴾

52. තවද අප මිනිසා කෙරෙහි අනුග්‍රහය පිරිනමන විට ඔහු නොසැලකිලිමත්ව ඉවත හැරෙන්නේය. නමුත් ඔහුට නපුර අත්වූ කල්හි, බලනු! ඔහු දීර්ඝ ප්‍රාර්ථනාවෙහි නිරතවන්නේය.

وَاِذَآ اَنْعَمْنَا عَلَى الْاِنْسَانِ اَعْرَضَ وَنَاٰ بِجَانِبِهٖ ۚ وَاِذَا مَسَّهُ الشَّرُّ فَذُوْ دُعَآءٍ عَرِيْضٍ ﴿٥٢﴾

53. පවසන්න, 'මා හට කියනු. එය අල්ලාහ් වෙතින් තිබියදී පසුව නුඹලා එය කෙරෙහි අවිශ්වාස කරන්නේ නම්, (අල්ලාහ්ගෙන්) ඉතා ඈතට ඉවත ගිය ඔහුට වඩා නොමග යන්නා කවරෙක්ද?'

قُلْ اَرَءَيْتُمْ اِنْ كَانَ مِنْ عِنْدِ اللّٰهِ ثُمَّ كَفَرْتُمْ بِهٖ مَنْ اَضَلُّ مِمَّنْ هُوَ فِيْ شِقَاقٍۭ بَعِيْدٍ ﴿٥٣﴾

54. මෙය සත්‍යයක් යැයි ඔවුන්ට ප්‍රත්‍යක්ෂ වන තෙක් ක්ෂිතිජයෙහිද ඔවුන්තුළද අපි ඉක්මණින්ම අපගේ සළකුණු ඔවුන්ට පෙන්වන්නෙමු. ඔබගේ අධිපතියාණන් සියළු දේ කෙරෙහි සාක්ෂිකරුවෙකු වීමට ප්‍රමාණවත් නොවේද?

سَنُرِيْهِمْ اٰيٰتِنَا فِى الْاٰفَاقِ وَفِيْٓ اَنْفُسِهِمْ حَتّٰى يَتَبَيَّنَ لَهُمْ اَنَّهُ الْحَقُّ ؕ اَوَلَمْ يَكْفِ بِرَبِّكَ اَنَّهٗ عَلٰى كُلِّ شَيْءٍ شَهِيْدٌ ﴿٥٤﴾

55. අවධාරණයයි! ඔවුන්ගේ අධිපතියාණන්ගේ හමුවීම පිළිබඳව නියතවශයෙන්ම ඔවුන් සැකයෙහිය. අවධාරණයයි! නිශ්චිතවම ඔහු සියළු දේ ග්‍රහණය කරන්නාය.

اَلَآ اِنَّهُمْ فِيْ مِرْيَةٍ مِّنْ لِّقَآءِ رَبِّهِمْ ؕ اَلَآ اِنَّهٗ بِكُلِّ شَيْءٍ مُّحِيْطٌ ﴿٥٥﴾ ع



අල් ෂූරා
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද, පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ②

2. හා, මීම්.◆

عٓسٓقٓ ③

3. අයින්, සීන්, කාෆ්.◆◆

كَذٰلِكَ يُوْحِيْٓ اِلَيْكَ وَاِلَى الَّذِيْنَ مِنْ قَبْلِكَ ۙ اللّٰهُ الْعَزِيْزُ الْحَكِيْمُ ④

4. බලසම්පන්න මෙන්ම ප්‍රඥාසම්පන්න වූ අල්ලාහ් ඔබටද ඔබට පෙර සිටි අයටද අනාවරණය කර ඇත්තේ මෙලෙසය.

لَهٗ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْاَرْضِ ۭ وَهُوَ الْعَلِيُّ الْعَظِيْمُ ⑤

5. අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද ඔහුටම අයත්ය. තවද ඔහු අති උසස්ය, අති ශ්‍රේෂ්ඨය.

تَكَادُ السَّمٰوٰتُ يَتَفَطَّرْنَ مِنْ فَوْقِهِنَّ وَالْمَلٰۗىِٕكَةُ يُسَبِّحُوْنَ بِحَمْدِ رَبِّهِمْ وَيَسْتَغْفِرُوْنَ لِمَنْ فِي الْاَرْضِ ۭ اَلَآ اِنَّ اللّٰهَ هُوَ الْغَفُوْرُ الرَّحِيْمُ ⑥

6. අහස් ඒවාට ඉහළින් පැළී යාමට ආසන්නය. තවද සුරදූතයින් ඔවුන්ගේ අධිපතියාණන්ව ඔහුගේ ප්‍රසංශාවෙන් සුවිශුද්ධ කරන්නෝය. තවද පොළොව මත සිටින අය වෙනුවෙන් ක්ෂමාව අයැදින්නෝය. බලනු! නියතවශයෙන් අල්ලාහ් ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

وَالَّذِيْنَ اتَّخَذُوْا مِنْ دُوْنِهٖٓ اَوْلِيَاۗءَ اللّٰهُ حَفِيْظٌ عَلَيْهِمْ ڮ وَمَآ اَنْتَ عَلَيْهِمْ بِوَكِيْلٍ ⑦

7. තවද ඔහු හැර (තමන්ට) ආරක්ෂකයින් ලෙස ගන්නා අය ගත්කල, අල්ලාහ් ඔවුන් ගැන පරීක්ෂාකාරීව සිටින්නේය. ඔබ ඔවුන් කෙරෙහි භාරකරුවෙකු නොවේ.

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

◆◆සියල්ල දත්තාය, සියල්ල අසන්නාය, පරිපූර්ණ බලය ඇත්තාය.

*8. තවද අපි ඔබට අරාබි බසින් මෙම කුර්ආනය මෙලෙස අනාවරණය කළේ, ඔබ මව් නගරයට සහ ඒ අවට සිටින සියල්ලන්ට අවවාද කරනු පිණිසත් කිසිදු සැකයක් නැති එක්රැස් කරන්නාවූ එම දිනය ගැන ඔබ (ඔවුනට) අවවාද කරනු පිණිසත්ය. (එදින) පිරිසක් ස්වර්ගයේ වෙසෙන අතර පිරිසක් ඇවිලෙන ගින්නෙහි වන්නෝය.

وَكَذٰلِكَ اَوْحَيْنَآ اِلَيْكَ قُرْاٰنًا عَرَبِيًّا لِّتُنْذِرَ اُمَّ الْقُرٰى وَمَنْ حَوْلَهَا وَتُنْذِرَ يَوْمَ الْجَمْعِ لَا رَيْبَ فِيْهِ ؕ فَرِيْقٌ فِى الْجَنَّةِ وَفَرِيْقٌ فِى السَّعِيْرِ ۝٨

9. තවද අල්ලාහ් අභිමත වූයේ නම් ඔහුට ඔවුන්ව එක් ජන සමූහයක් කරන්නට තිබුණි. නමුත් ඔහු අභිමත ඕනෑම කෙනෙකුව ඔහු තම දයාවෙහි ඇතුළු කරන්නේය. තවද වරදකරුවන් ගත්කල, ඔවුන්ට කිසිදු ආරක්ෂකයෙකු හෝ උදව්කරුවෙකු හෝ නොවනු ඇත.

وَلَوْ شَآءَ اللّٰهُ لَجَعَلَهُمْ اُمَّةً وَّاحِدَةً وَّلٰكِنْ يُّدْخِلُ مَنْ يَّشَآءُ فِىْ رَحْمَتِهٖ ؕ وَالظّٰلِمُوْنَ مَا لَهُمْ مِّنْ وَّلِىٍّ وَّلَا نَصِيْرٍ ۝٩

10. ඔහු හැර අන්අයව ඔවුන් (තමන්ට) ආරක්ෂකයින් ලෙස ගත්තේද? නමුත් (සැබෑ) ආරක්ෂකයා වනුයේ අල්ලාහ්ය. තවද ඔහු මළවුන්ට ජීවය දෙන්නේය. තවද ඔහු සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

اَمِ اتَّخَذُوْا مِنْ دُوْنِهٖٓ اَوْلِيَآءَ ۚ فَاللّٰهُ هُوَ الْوَلِىُّ وَهُوَ يُحْىِ الْمَوْتٰى ۘ وَهُوَ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ۝١٠

11. තවද නුඹලා කවර දෙයෙහි මතභේද ඇති කරන්නේද, එහි තීරණය අල්ලාහ් වෙතමය. (පවසන්න), 'නුඹලාගේ අල්ලාහ් වන ඔහුම මාගේ අධිපතියාණන්ය. මම ඔහු කෙරෙහිම මාගේ විශ්වාසය තබන්නෙමි. තවද ඔහු වෙතම මම (නිරතුරුව) හැරෙන්නෙමි'.

وَمَا اخْتَلَفْتُمْ فِيْهِ مِنْ شَىْءٍ فَحُكْمُهٗٓ اِلَى اللّٰهِ ؕ ذٰلِكُمُ اللّٰهُ رَبِّىْ عَلَيْهِ تَوَكَّلْتُ ۖ وَاِلَيْهِ اُنِيْبُ ۝١١

12. අහස් සහ පොළොවේ පරම මැවුම්කරුවාණන් (ඔහු)ය. ඔහු

فَاطِرُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ جَعَلَ لَكُمْ

*සටහන. 8: අල්ලාහ්ව නැමදීම සඳහා පළමුවෙන්ම සාදන ලද නිවස, මක්කා නම් නගරයෙහි පිහිටි කඃබාව වේ. 'උම්මුල් කුරා' යැයි සඳහන් වන මෙම නගරය, නගරයන්හි මව් නගරය වේ. මෙම යෙදුම අන් නගරයන් සමග සසඳන විට මෙම නගරයට ඇති වැදගත්කම විදහා දක්වයි. එමෙන්ම වචනානුසාරයෙන් එය මුලින්ම ගොඩනගන ලද නගරය විය හැක. එසේ වූයේ නම්, ආදි කාලයේදී (මක්කා නගරයේ පිහිටි) මෙම ස්ථානයේ නොහඳුනන ජනතාවක් විසින් දෙවියන්ගේ නිවස මුලදී සෑදූ විට ඒ අවට මෙම නගරය ක්‍රමයෙන් දියුණු වන්නට විය. මනුෂ්‍ය වර්ගයා මෙය අනුකරණය කරමින් නගරයන් තනන්නට පුරුදු පුහුණු විය. මෙලෙස එය නගරයන්හි මව් නගරය ලෙස සඳහන් කළ හැකිය.

مِّنۡ اَنۡفُسِكُمۡ اَزۡوَاجًا وَّمِنَ الۡاَنۡعَامِ اَزۡوَاجًا ۚ يَذۡرَؤُكُمۡ فِيۡهِ ‌ؕ لَيۡسَ كَمِثۡلِهٖ شَىۡءٌ ۚ وَهُوَ السَّمِيۡعُ الۡبَصِيۡرُ ﴿۱۱﴾

නුඹලාගේ ප්‍රයෝජනය තකා නුඹලාගෙන් ජෝඩුද ගවසතුන්ගෙන් ජෝඩුද ඇති කළේය. ඔහු නුඹලාව එහි ප්‍රගුණ කරන්නේය. ඔහු මෙන් අන් කිසිවක් නොමැත. තවද ඔහු සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

لَهٗ مَقَالِيۡدُ السَّمٰوٰتِ وَالۡاَرۡضِ‌ۚ يَبۡسُطُ الرِّزۡقَ لِمَنۡ يَّشَآءُ وَيَقۡدِرُ‌ ؕ اِنَّهٗ بِكُلِّ شَىۡءٍ عَلِيۡمٌ ﴿۱۲﴾

13. අහස් සහ පොළොවේ යතුරු අයත් වන්නේ ඔහුටමය. ඔහු තමා අභිමත ඕනෑම කෙනෙකුට ජීවනෝපාය බහුලව දෙන්නේය. තවද (ඔහු තමා අභිමත ඕනෑම කෙනෙකුට එය) අඩු කර දෙන්නේය. නියතවශයෙන්ම ඔහු සියළු දේ ඉතා මැනැවින් දත්තාය.

شَرَعَ لَكُمۡ مِّنَ الدِّيۡنِ مَا وَصّٰى بِهٖ نُوۡحًا وَّالَّذِىۡۤ اَوۡحَيۡنَاۤ اِلَيۡكَ وَمَا وَصَّيۡنَا بِهٖۤ اِبۡرٰهِيۡمَ وَمُوۡسٰى وَعِيۡسٰٓى اَنۡ اَقِيۡمُوا الدِّيۡنَ وَلَا تَتَفَرَّقُوۡا فِيۡهِ‌ ؕ كَبُرَ عَلَى الۡمُشۡرِكِيۡنَ مَا تَدۡعُوۡهُمۡ اِلَيۡهِ‌ ؕ اَللّٰهُ يَجۡتَبِىۡۤ اِلَيۡهِ مَنۡ يَّشَآءُ وَيَهۡدِىۡۤ اِلَيۡهِ مَنۡ يُّنِيۡبُ ﴿۱۳﴾

14. ඔහු නූහ්ට අණ කළ දේම ඔබටද ධර්මය ලෙස පිරිනමා ඇත්තේය. එමෙන්ම අප ඔබ වෙත අනාවරණය කර ඇති දේ සහ අප ඉබ්රාහිම්ටද මූසාටද ඊසාටද අණකළ දේ වනුයේ 'අවනතභාවයෙහි ස්ථිරසාරව නිරත වනු. තවද එහි භේදබින්න ඇති නොකරනු' යන්නය. ඔබ ප්‍රතිමා පුදන්නන්ව කවර දේ වෙත කැඳවන්නේද එය ඔවුනට දුෂ්කරය. අල්ලාහ් ඔහු අභිමත කෙනෙකුව තමා වෙනුවෙන් තෝරාගන්නේය. තවද (ඔහුවෙත) හැරෙන අයහට ඔහු මග පෙන්වන්නේය.

وَمَا تَفَرَّقُوۡۤا اِلَّا مِنۡۢ بَعۡدِ مَا جَآءَهُمُ الۡعِلۡمُ بَغۡيًاۢ بَيۡنَهُمۡ‌ ؕ وَلَوۡلَا كَلِمَةٌ سَبَقَتۡ مِنۡ رَّبِّكَ اِلٰٓى اَجَلٍ مُّسَمًّى لَّقُضِىَ بَيۡنَهُمۡ‌ ؕ وَاِنَّ الَّذِيۡنَ اُوۡرِثُوا الۡكِتٰبَ مِنۡۢ بَعۡدِهِمۡ لَفِىۡ شَكٍّ مِّنۡهُ مُرِيۡبٍ ﴿۱۴﴾

15. ඔවුන් වෙත දැනුම පැමිණියායින් පසුව මිස ඔවුන් භේද බින්න නොවූහ. ඔවුන් එකිනෙකාට ඇති ක්‍රෝධය හේතුවෙන් (එසේ කළහ). ඔබගේ අධිපතියාණන්ගෙන් නියමිත කාලයක් සඳහා මීට පෙරවූ වදනක් නොවන්නට, (කාරණය) නියත වශයෙන්ම ඔවුනතර තීරණය වන්නට තිබුණි. තවද නියතවශයෙන්ම ඔවුන්ට පසු පුස්තකයට උරුම කරනු ලැබූ අය, එය පිළිබඳව සැනසිල්ලක් ගෙන නොදෙන්නාවූ සැකයෙහි සිටිති.

فَلِذٰلِكَ فَادْعُ ۚ وَاسْتَقِمْ كَمَآ اُمِرْتَ ۚ وَلَا تَتَّبِعْ اَهْوَآءَهُمْ ۚ وَقُلْ اٰمَنْتُ بِمَآ اَنْزَلَ اللّٰهُ مِنْ كِتٰبٍ ۚ وَاُمِرْتُ لِاَعْدِلَ بَيْنَكُمْ ؕ اَللّٰهُ رَبُّنَا وَرَبُّكُمْ ؕ لَنَآ اَعْمَالُنَا وَلَكُمْ اَعْمَالُكُمْ ؕ لَا حُجَّةَ بَيْنَنَا وَبَيْنَكُمْ ؕ اَللّٰهُ يَجْمَعُ بَيْنَنَا ۚ وَاِلَيْهِ الْمَصِيْرُ ؕ﴿١٦﴾

16. එබැවින් මේ වෙතටම ඔබ (මිනිස් වර්ගයාව) කැඳවන්න. තවද ඔබ අණ කරනු ලැබූ පරිදි ඔබ ස්ථිරසාර වන්න. තවද ඔවුන්ගේ නරක අභිලාෂයන් අනුගමනය නොකරන්න. තවද පවසන්න, 'මම අල්ලාහ් පහළ කර ඇති ග්‍රන්ථය කෙරෙහි විශ්වාස කරමි. තවද නුඹලා අතර සාධාරණව විනිශ්චය කිරීමට මම අණ කරන ලද්දෙමි. අල්ලාහ් අපගේ අධිපතියාණන්ද නුඹලාගේ අධිපතියාණන්ද වන්නේය. අපගේ ක්‍රියාවන්(හි තිළිණය) අපටය. තවද නුඹලාගේ ක්‍රියාවන්(හි තිළිණය) නුඹලාටය. නුඹලා සහ අප අතර කිසිදු ආරවුලක් නැත. අල්ලාහ් අප සියල්ලන්වම එක්රැස් කරන්නේය. තවද ආපසු යෑම ඔහු වෙතටය'.

وَالَّذِيْنَ يُحَآجُّوْنَ فِى اللّٰهِ مِنْۢ بَعْدِ مَا اسْتُجِيْبَ لَهٗ حُجَّتُهُمْ دَاحِضَةٌ عِنْدَ رَبِّهِمْ وَعَلَيْهِمْ غَضَبٌ وَّلَهُمْ عَذَابٌ شَدِيْدٌ ﴿١٧﴾

17. තවද අල්ලාහ් ගැන ඔහුව පිළිගනු ලැබුවායින් පසුවද, තර්ක කරන අය ගත්කල ඔවුන්ගේ තර්කය ඔවුන්ගේ අධිපතියාණන් (වන අල්ලාහ්)ගේ දැක්මෙහි නිෂ්ඵලය. තවද ඔවුන් මත (අල්ලාහ්ගේ) කෝපය වේ. තවද ඔවුන්ට බරපතල දඬුවමක්ද වන්නේය.

اَللّٰهُ الَّذِىْٓ اَنْزَلَ الْكِتٰبَ بِالْحَقِّ وَالْمِيْزَانَ ؕ وَمَا يُدْرِيْكَ لَعَلَّ السَّاعَةَ قَرِيْبٌ ﴿١٨﴾

18. සත්‍යය සමග ග්‍රන්ථය සහ තුලාව පහළ කර ඇත්තේ අල්ලාහ්මය. තවද එම හෝරාව අතලඟ යැයි ඔබට දැනගන්නට සලස්වන්නේ කුමක්ද?

يَسْتَعْجِلُ بِهَا الَّذِيْنَ لَا يُؤْمِنُوْنَ بِهَا ۚ وَالَّذِيْنَ اٰمَنُوْا مُشْفِقُوْنَ مِنْهَا ۙ وَيَعْلَمُوْنَ اَنَّهَا الْحَقُّ ؕ اَلَآ اِنَّ الَّذِيْنَ يُمَارُوْنَ فِى السَّاعَةِ لَفِىْ ضَلٰلٍۢ بَعِيْدٍ ﴿١٩﴾

19. එය කෙරෙහි විශ්වාස නොකරන අය එය ඉක්මන් වන්නට පතන්නෝය. නමුත් විශ්වාස කරන අය එය ගැන බිය වෙති. තවද එය සත්‍යයක් යැයි දනිති. ප්‍රවේසම් වනු! එම හෝරාව සම්බන්ධව වාද කරන අය නොමගෙහි ඉතා දුර ගොස්ය.

اَللّٰهُ لَطِيْفٌۢ بِعِبَادِهٖ يَرْزُقُ مَنْ يَّشَآءُ ۚ وَهُوَ الْقَوِيُّ الْعَزِيْزُ ﴿٢٠﴾

20. අල්ලාහ් තම දාසයින් හට අතිශයින්ම කරුණාවන්තය. ඔහු අභිමත අයට ඔහු ජීවනෝපාය සපයන්නෝය. තවද ඔහු ශක්තිසම්පන්නය, බලසම්පන්නය.

مَنْ كَانَ يُرِيْدُ حَرْثَ الْاٰخِرَةِ نَزِدْ لَهٗ فِيْ حَرْثِهٖ ۚ وَمَنْ كَانَ يُرِيْدُ حَرْثَ الدُّنْيَا نُؤْتِهٖ مِنْهَا وَمَا لَهٗ فِي الْاٰخِرَةِ مِنْ نَّصِيْبٍ ﴿٢١﴾

21. කවුරුන් හෝ පරලොවේ අස්වැන්නට ප්‍රිය කරන්නේද අපි ඔහුට ඔහුගේ අස්වැන්නෙහි වැඩි කර දෙන්නෙමු. තවද කවුරුන් හෝ මෙලොව අස්වැන්නට ප්‍රිය කරන්නේද අපි (එයින්) ඔහුට දෙන්නෙමු. නමුත් පරලොවෙහි ඔහුට කිසිදු කොටසක් නොලැබෙනු ඇත.

اَمْ لَهُمْ شُرَكٰٓؤُا شَرَعُوْا لَهُمْ مِّنَ الدِّيْنِ مَا لَمْ يَاْذَنْۢ بِهِ اللّٰهُ ؕ وَلَوْلَا كَلِمَةُ الْفَصْلِ لَقُضِيَ بَيْنَهُمْ ؕ وَاِنَّ الظّٰلِمِيْنَ لَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿٢٢﴾

22. අල්ලාහ් අනුමත කර නොමැති දේ ඔවුන් සඳහා ධර්මයෙහි නිත්‍යානුකූල කළ (අල්ලාහ්ට සමාන තැබූ එවන්) සහකරුවන් ඔවුනට සිටින්නේද? තවද අවසාන විනිශ්චය පිළිබඳව (අපගේ) වචනය නොවූයේ නම් (කාරණය) ඔවුනතර (දැනටත්) තීරණය දෙනු ලබන්නට තිබුණි. තවද නියතවශයෙන්ම වරදකරුවන්ට වේදනීය දඬුවමක් ලැබෙනු ඇත.

تَرَى الظّٰلِمِيْنَ مُشْفِقِيْنَ مِمَّا كَسَبُوْا وَهُوَ وَاقِعٌۢ بِهِمْ ؕ وَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ فِيْ رَوْضٰتِ الْجَنّٰتِ ۚ لَهُمْ مَّا يَشَآءُوْنَ عِنْدَ رَبِّهِمْ ؕ ذٰلِكَ هُوَ الْفَضْلُ الْكَبِيْرُ ﴿٢٣﴾

23. වරදකරුවන්ව ඔවුන් ඉපැයූ දේ හේතුවෙන් බියෙන් පසුවනු ඔබ දකින්නෙහිය. තවද එය ඔවුන් මත අත්වනු නියතය. නමුත් විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අය ස්වර්ගයේ සරුසාර උයන්වල සිටිනු ඇත. ඔවුන් ප්‍රිය කරන ඕනෑම දෙයක් ඔවුන්ගේ අධිපතියාණන් වෙතින් ඔවුන් ලබන්නෝය. එය (අධිපතියාණන්ගේ) මහත් වූ අනුග්‍රහය වේ.

ذٰلِكَ الَّذِيْ يُبَشِّرُ اللّٰهُ عِبَادَهُ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ ؕ قُلْ لَّآ اَسْـَٔلُكُمْ

24. විශ්වාස කොට යහපත් ක්‍රියා කරන තම දාසයින්හට අල්ලාහ් දෙන ශුභාරංචිය මෙය වන්නේය. පවසන්න, 'ඥාතීන් අතර සෙනෙහස දැක්වීම හැරෙන්නට මම එය වෙනුවෙන්

عَلَيۡهِ اَجۡرًا اِلَّا الۡمَوَدَّةَ فِى الۡقُرۡبٰى ؕ وَمَنۡ يَّقۡتَرِفۡ حَسَنَةً نَّزِدۡ لَهٗ فِيۡهَا حُسۡنًا ؕ اِنَّ اللّٰهَ غَفُوۡرٌ شَكُوۡرٌ ﴿٢٤﴾

නුඹලාගෙන් කිසිදු තිළිණයක් නොඉල්ලමි'. තවද කවරෙකු හෝ යහපත කරන්නේද අපි ඔහුට එහි අලංකාරය වැඩි කර දෙන්නෙමු. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, ඉතා අගය කරන්නාය.

اَمۡ يَقُوۡلُوۡنَ افۡتَرٰى عَلَى اللّٰهِ كَذِبًا‌ ۚ فَاِنۡ يَّشَاِ اللّٰهُ يَخۡتِمۡ عَلٰى قَلۡبِكَ ؕ وَيَمۡحُ اللّٰهُ الۡبَاطِلَ وَيُحِقُّ الۡحَقَّ بِكَلِمٰتِهٖ ؕ اِنَّهٗ عَلِيۡمٌۢ بِذَاتِ الصُّدُوۡرِ ﴿٢٥﴾

25. ඔවුන්, 'ඔහු අල්ලාහ්ට එරෙහිව බොරුවක් ගොතා ඇතැ'යි කියන්නෝද? අල්ලාහ් අභිමත වූයේ නම්, ඔබගේ හදවතෙහි ඔහුට මුද්‍රා තැබිය හැක. නමුත් අල්ලාහ් බොරුව මකා දමා ඔහුගේ විධානයන් මගින් සත්‍යය ස්ථාපිත කරන්නේය. නියතවශයෙන්ම ඔහු සිත්හි ඇති දේ මැනැවින් දන්නේය.

وَهُوَ الَّذِىۡ يَقۡبَلُ التَّوۡبَةَ عَنۡ عِبَادِهٖ وَيَعۡفُوۡا عَنِ السَّيِّاٰتِ وَيَعۡلَمُ مَا تَفۡعَلُوۡنَ ۙ﴿٢٦﴾

26. තවද ඔහුම තම දාසයින් වෙතින් වන පශ්චාත්තාප පිළිගන්නේය. තවද පව් ක්ෂමා කරන්නේය. තවද නුඹලා කරන දේ ඔහු දන්නේය.

وَيَسۡتَجِيۡبُ الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ وَيَزِيۡدُهُمۡ مِّنۡ فَضۡلِهٖ ؕ وَالۡكٰفِرُوۡنَ لَهُمۡ عَذَابٌ شَدِيۡدٌ ﴿٢٧﴾

27. තවද ඔහු විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අය(ගේ ප්‍රාර්ථනාවන්) පිළිගන්නේය. තවද ඔහුගේ වරප්‍රසාදයෙන් ඔවුන්ට වැඩියෙන් දෙන්නේය. තවද අවිශ්වාසීතයින් ගත්කල, ඔවුන්ට දැඩි දඬුවමක් ලැබෙනු ඇත.

وَلَوۡ بَسَطَ اللّٰهُ الرِّزۡقَ لِعِبَادِهٖ لَبَغَوۡا فِى الۡاَرۡضِ وَلٰـكِنۡ يُّنَزِّلُ بِقَدَرٍ مَّا يَشَآءُ ؕ اِنَّهٗ بِعِبَادِهٖ خَبِيۡرٌۢ بَصِيۡرٌ ﴿٢٨﴾

28. තවද අල්ලාහ් ඔහුගේ දාසයින් හට ජීවනෝපාය බහුලව දුන්නේ නම් ඔවුන් පොළොවෙහි කැරලි ගසනු ඇත. එහෙත්, ඔහු අභිමත වන පරිදි (නියමිත) ප්‍රමාණයකට අනුව ඔහු පහළ කරන්නේය. ඇත්තෙන්ම ඔහු තම දාසයින් පිළිබඳව සියල්ල විමසිලිමත්ය, සියල්ල දකින්නාය.

وَهُوَ الَّذِىۡ يُنَزِّلُ الۡغَيۡثَ مِنۡۢ بَعۡدِ مَا

29. තවද ඔවුන් බලාපොරොත්තු සුන් කරගත් පසු වර්ෂාව පහළ කරන්නේ

قَنَطُوا وَيَنْشُرُ رَحْمَتَهُ ۚ وَهُوَ الْوَلِيُّ الْحَمِيدُ ﴿٢٩﴾

ඔහුමය. තවද තම දයාව පතුරුවන්නේය. තවද ඔහු ආරක්ෂකයාය, ප්‍රශංසා හිමිය.

وَمِنْ اٰيٰتِهٖ خَلْقُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَثَّ فِيْهِمَا مِنْ دَآبَّةٍ ۚ وَهُوَ عَلٰى جَمْعِهِمْ اِذَا يَشَآءُ قَدِيْرٌ ﴿٣٠﴾

30. තවද අහස් සහ පොළොවේ මැවීමද ඒ දෙකෙහි ඔහු පතුරුවා ඇති සියළු පිවින්ද ඔහුගේ සළකුණු අතරින්ය. තවද ඔහු අභිමත කරන විටදී ඔවුන්ව එක්රැස් කිරීමටද ඔහු බලය ඇත්තාය.

وَمَاۤ اَصَابَكُمْ مِّنْ مُّصِيْبَةٍ فَبِمَا كَسَبَتْ اَيْدِيْكُمْ وَيَعْفُوْا عَنْ كَثِيْرٍ ﴿٣١﴾

31. තවද නුඹලාට යම් අභාග්‍යයක් අත්වූයේ නම් එය නුඹලාගේම අත් ඉපැයූ දේ හේතුවෙනි. තවද ඔහු (නුඹලාගේ පව්) බොහොමයක් ක්ෂමාකරන්නේය.

وَمَاۤ اَنْتُمْ بِمُعْجِزِيْنَ فِى الْاَرْضِ ۚ وَمَا لَكُمْ مِّنْ دُوْنِ اللّٰهِ مِنْ وَّلِيٍّ وَّلَا نَصِيْرٍ ﴿٣٢﴾

32. තවද පොළොවෙහි (අල්ලාහ්ගේ සැලැස්ම) නුඹලා පරාජය කරන්නන් විය නොහැක. තවද නුඹලාට අල්ලාහ් හැර කිසිදු මිතුරෙකුද උදව්කරුවෙකුද නැත.

وَمِنْ اٰيٰتِهِ الْجَوَارِ فِى الْبَحْرِ كَالْاَعْلَامِ ﴿٣٣﴾

33. තවද සයුරෙහි යාත්‍රා කරන කඳුමෙන් නැව් ඔහුගේ සළකුණු අතරින්ය.

اِنْ يَّشَاْ يُسْكِنِ الرِّيْحَ فَيَظْلَلْنَ رَوَاكِدَ عَلٰى ظَهْرِهٖ ۚ اِنَّ فِىْ ذٰلِكَ لَاٰيٰتٍ لِّكُلِّ صَبَّارٍ شَكُوْرٍ ﴿٣٤﴾

34. තවද ඔහු අභිමත වන්නේ නම් ඔහුට සුළඟ නතර කළ හැකිය. පසුව එහි(සයුර) මතුපිට ඒවා නිශ්චල වනු ඇත. නියතවශයෙන්ම ඉවසිලිවන්තව කෘතගුණ දක්වන සියල්ලන්ටම එහි සළකුණු ඇත.

اَوْ يُوْبِقْهُنَّ بِمَا كَسَبُوْا وَيَعْفُ عَنْ كَثِيْرٍ ﴿٣٥﴾

35. නැත්නම් (ගමන් ගන්නා) ඔවුන් ඉපැයූ දේ හේතු කොට ගෙන ඔහුට ඒවා (නැව්) විනාශ කළ හැක. නමුත් ඔහු (ඔවුන්ගේ පව්) බොහොමයක් ක්ෂමා කරන්නේය.

وَّيَعْلَمَ الَّذِيْنَ يُجَادِلُوْنَ فِىْۤ اٰيٰتِنَا ۚ مَا لَهُمْ مِّنْ مَّحِيْصٍ ﴿٣٦﴾

36. තවද අපගේ සළකුණු පිළිබඳව තර්ක කරන අය ගත්කල ඔවුන්ට පිළිසරණක් නොමැති බව ඔවුන් දැනගනු පිණිස(ඔහු ඒවා විනාශ කරන්නේ)ය.

| | |
|---|---|
| 37. එබැවින් නුඹලාට කවර දෙයක් දෙනු ලැබුවේද, එය මෙලොව ජීවිතයේ තාවකාලික ජීවනෝපායක් පමණි. නමුත් විශ්වාස කළ අයටද තමන්ගේ අපේක්ෂාව තමන්ගේ අධිපතියාණන් කෙරෙහි තබන්නන් හටද අල්ලාහ් වෙත ඇති දේ ඉතා යහපත් මෙන්ම කල් පවතින්නකි. | فَمَآ اُوْتِيْتُمْ مِّنْ شَيْءٍ فَمَتَاعُ الْحَيٰوةِ الدُّنْيَا ۚ وَمَا عِنْدَ اللّٰهِ خَيْرٌ وَّاَبْقٰى لِلَّذِيْنَ اٰمَنُوْا وَعَلٰى رَبِّهِمْ يَتَوَكَّلُوْنَ ۚ﴿۳۷﴾ |
| 38. තවද ඔවුන් බරපතල පව් සහ දුසිරිත් වලින් මිදෙන්නෝය. එමෙන්ම ඔවුන් කෝපාවිෂ්ඨ වූ කල්හි ඔවුන් සමාව දෙන්නෝය. | وَالَّذِيْنَ يَجْتَنِبُوْنَ كَبٰٓئِرَ الْاِثْمِ وَالْفَوَاحِشَ وَاِذَا مَا غَضِبُوْا هُمْ يَغْفِرُوْنَ ۚ﴿۳۸﴾ |
| 39. තවද ඔවුන් ඔවුන්ගේ අධිපතියාණන්ට සවන් දෙන්නෝය. තවද නැමදුමෙහි නිරත වන්නෝය. තවද ඔවුන්ගේ කටයුතු අන්‍යෝන්‍ය සාකච්ඡා මගින් (තීරණය) කරනු ලබන්නේය. තවද අප ඔවුන්ට සපයා දුන් දෙයින් වැය කරන්නෝය. | وَالَّذِيْنَ اسْتَجَابُوْا لِرَبِّهِمْ وَاَقَامُوا الصَّلٰوةَ ۖ وَاَمْرُهُمْ شُوْرٰى بَيْنَهُمْ ۖ وَمِمَّا رَزَقْنٰهُمْ يُنْفِقُوْنَ ۚ﴿۳۹﴾ |
| 40. තවද ඔවුනට හිරිහැරයක් සිදු වන විට ඔවුන් ආත්මාරක්ෂා කරගන්නෝය. | وَالَّذِيْنَ اِذَآ اَصَابَهُمُ الْبَغْيُ هُمْ يَنْتَصِرُوْنَ ﴿۴۰﴾ |
| 41. තවද හිංසාවට එවැනි හිංසාවම ප්‍රතිඵලය වේ. නමුත් කවුරුන් හෝ සමාව දෙමින් (තමන්ව) නිවැරදි කරගන්නේද ඔහුගේ තිළිණය අල්ලාහ් වෙතය. නියතවශයෙන්ම ඔහු වරදකරුවන්ව ප්‍රිය නොකරයි. | وَجَزٰٓؤُا سَيِّئَةٍ سَيِّئَةٌ مِّثْلُهَا ۚ فَمَنْ عَفَا وَاَصْلَحَ فَاَجْرُهٗ عَلَى اللّٰهِ ۗ اِنَّهٗ لَا يُحِبُّ الظّٰلِمِيْنَ ﴿۴۱﴾ |
| 42. නමුත් කවුරුන් හෝ තමන්ට අසාධාරණය සිදුවුවායින් පසුව ආත්මාරක්ෂා කරගන්නේද ඔවුන් කෙරෙහි දොස් පැවරීමක් නැත. | وَلَمَنِ انْتَصَرَ بَعْدَ ظُلْمِهٖ فَاُولٰٓئِكَ مَا عَلَيْهِمْ مِّنْ سَبِيْلٍ ۗ﴿۴۲﴾ |
| 43. දොස් පැවරීම වන්නේ මිනිසුන්ට අසාධාරණය ඇතිකරමින් පොළොවෙහි යුක්තියෙන් තොරව සීමාව ඉක්මවන අය මතය. එවැන්නන්ට වේදනීය දඬුවමක් ලැබෙනු ඇත. | اِنَّمَا السَّبِيْلُ عَلَى الَّذِيْنَ يَظْلِمُوْنَ النَّاسَ وَيَبْغُوْنَ فِى الْاَرْضِ بِغَيْرِ الْحَقِّ ۗ اُولٰٓئِكَ لَهُمْ عَذَابٌ اَلِيْمٌ ﴿۴۳﴾ |

44. එමෙන්ම කවුරුන් හෝ ඉවසිලිමත් වෙමින් සමාව දෙන්නේද, එය නියතවශයෙන්ම දැඩි අධිෂ්ඨානයෙන් යුත් කාර්යයකි.

وَلَمَنْ صَبَرَ وَغَفَرَ اِنَّ ذٰلِكَ لَمِنْ عَزْمِ الْاُمُوْرِ ﴿٤٤﴾

45. තවද, අල්ලාහ් කවරෙකුව නොමග යන්නට ඉඩ හරින්නේද, ඉන් පසුව ඔහුට කිසිම ආරක්ෂකයෙකු නොවන්නේය. තවද, වරදකරුවන් දඬුවම දකින විට 'ආපසු යෑමේ කිසියම් මගක් තිබේද?'යි පවසනු ඔබ දකිනු ඇත.

وَمَنْ يُّضْلِلِ اللّٰهُ فَمَا لَهٗ مِنْ وَّلِيٍّ مِّنْۢ بَعْدِهٖ ؕ وَتَرَى الظّٰلِمِيْنَ لَمَّا رَاَوُا الْعَذَابَ يَقُوْلُوْنَ هَلْ اِلٰى مَرَدٍّ مِّنْ سَبِيْلٍ ۚ﴿٤٥﴾

46. තවද ඔවුන් එය (ගින්න) ඉදිරියට ගෙන එනු ලබන විට අවමානය හේතුවෙන් (ඔවුන්ගේ ඇස්) පහතට යොමු වී (ඒ වෙත) හොරැහින් බලනු ඔබ දකින්නෙහිය. තවද, විශ්වාස කරන අය (මෙසේ) පවසන්නෝය. 'ඇත්තෙන්ම පාඩු විඳින්නන් වන්නේ තමන්වද, තමන්ගේ පවුලේ අයවද පුනරුත්ථාන දිනයේදී විනාශ කර ගන්නා අයවේ'. ප්‍රවේසම් වනු! නියතවශයෙන්ම වරදකරුවන් ස්ථිරවූ දඬුවමෙහි (සිටින්නෝ)ය.

وَتَرٰىهُمْ يُعْرَضُوْنَ عَلَيْهَا خٰشِعِيْنَ مِنَ الذُّلِّ يَنْظُرُوْنَ مِنْ طَرْفٍ خَفِيٍّ ؕ وَقَالَ الَّذِيْنَ اٰمَنُوْۤا اِنَّ الْخٰسِرِيْنَ الَّذِيْنَ خَسِرُوْۤا اَنْفُسَهُمْ وَاَهْلِيْهِمْ يَوْمَ الْقِيٰمَةِ ؕ اَلَاۤ اِنَّ الظّٰلِمِيْنَ فِيْ عَذَابٍ مُّقِيْمٍ ﴿٤٦﴾

47. තවද, අල්ලාහ් හැර ඔවුන්ට උදව් කිරීමට උදව්කරුවන් කිසිවෙක් ඔවුන්ට නොවනු ඇත. එමෙන්ම අල්ලාහ් කවරෙකුව නොමග යන්නට ඉඩ හරින්නේද, ඔහුට කිසිම මගක් (කිසිසේත්ම) නොවනු ඇත.

وَمَا كَانَ لَهُمْ مِّنْ اَوْلِيَآءَ يَنْصُرُوْنَهُمْ مِّنْ دُوْنِ اللّٰهِ ؕ وَمَنْ يُّضْلِلِ اللّٰهُ فَمَا لَهٗ مِنْ سَبِيْلٍ ؕ﴿٤٧﴾

48. අල්ලාහ්ගෙන් බේරී යා නොහැකි දිනය පැමිණීමට පෙර නුඹලා නුඹලාගේ අධිපතියාණන්ට සවන් දෙනු. එදින නුඹලාට කිසිදු පිළිසරණක් නොවනු ඇත. තවද, නුඹලාට ප්‍රතික්ෂේප කිරීමට (අවස්ථාවක්ද) නොවනු ඇත.

اِسْتَجِيْبُوْا لِرَبِّكُمْ مِّنْ قَبْلِ اَنْ يَّاْتِيَ يَوْمٌ لَّا مَرَدَّ لَهٗ مِنَ اللّٰهِ ؕ مَا لَكُمْ مِّنْ مَّلْجَاٍ يَّوْمَئِذٍ وَّمَا لَكُمْ مِّنْ نَّكِيْرٍ ﴿٤٨﴾

49. නමුත් ඔවුන් ඉවත හැරෙන්නේ නම්, අපි ඔවුන්ව රැකබලා ගන්නෙකු

فَاِنْ اَعْرَضُوْا فَمَاۤ اَرْسَلْنٰكَ عَلَيْهِمْ

حَفِيظًا ۖ إِنْ عَلَيْكَ إِلَّا الْبَلَاغُ ۗ وَإِنَّا إِذَا أَذَقْنَا الْإِنسَانَ مِنَّا رَحْمَةً فَرِحَ بِهَا ۖ وَإِن تُصِبْهُمْ سَيِّئَةٌ بِمَا قَدَّمَتْ أَيْدِيهِمْ فَإِنَّ الْإِنسَانَ كَفُورٌ ﴿٤٩﴾

ලෙස ඔබව නොඑව්වෙමු. ඔබගේ වගකීම වන්නේ (පණිවිඩය) දන්වා සිටීම පමණි. තවද නියතවශයෙන්ම අපි මිනිසාට අපගේ දයාව විඳින්නට සැලැස්වූ විට ඔහු එහි ප්‍රීති වන්නේය. නමුත් ඔවුන්ගේ අත් පෙරට යැවූ දේ හේතුවෙන් ඔවුන්ට නපුරක් අත් වන්නේ නම්, එවිට බලනු! මිනිසා අකෘතඥ වන්නේය.

لِّلَّهِ مُلْكُ السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ يَخْلُقُ مَا يَشَاءُ ۚ يَهَبُ لِمَن يَشَاءُ إِنَاثًا وَيَهَبُ لِمَن يَشَاءُ الذُّكُورَ ﴿٥٠﴾

50. අහස් සහ පොළොවේ රාජධානිය අල්ලාහ්ට අයත්වේ. ඔහු අභිමත දේ ඔහු මවන්නේය. ඔහු අභිමත අයට ඔහු ගැහැණු දරුවන් පිරිනමන්නේය. ඔහු අභිමත අයට ඔහු පිරිමි දරුවන් පිරිනමන්නේය.

أَوْ يُزَوِّجُهُمْ ذُكْرَانًا وَإِنَاثًا ۖ وَيَجْعَلُ مَن يَشَاءُ عَقِيمًا ۚ إِنَّهُ عَلِيمٌ قَدِيرٌ ﴿٥١﴾

51. නැතහොත් ඔහු ඔවුන්ව පුරුෂ සහ ස්ත්‍රී වශයෙන් මිශ්‍ර කරන්නේය. ඔහු අභිමත අයට වඳභාවය ඇති කරන්නේය. නියතවශයෙන්ම ඔහු සියල්ල දත්තාය, බලය ඇත්තාය.

وَمَا كَانَ لِبَشَرٍ أَن يُكَلِّمَهُ اللَّهُ إِلَّا وَحْيًا أَوْ مِن وَرَاءِ حِجَابٍ أَوْ يُرْسِلَ رَسُولًا فَيُوحِيَ بِإِذْنِهِ مَا يَشَاءُ ۚ إِنَّهُ عَلِيٌّ حَكِيمٌ ﴿٥٢﴾

52. අනාවරණය මගින් හෝ තිරයක පිටුපසින් සිට හෝ ඔහුගේ අණ පරිදි ඔහු අභිමත දේ අනාවරණය කරන දූතයෙකුව එවීමෙන් හෝ මිස කිසිදු මිනිසෙකුට අල්ලාහ් කතා නොකරයි. නියතවශයෙන්ම අල්ලාහ් අති උසස්ය, ප්‍රඥාසම්පන්නය.

وَكَذَٰلِكَ أَوْحَيْنَا إِلَيْكَ رُوحًا مِّنْ أَمْرِنَا ۚ مَا كُنتَ تَدْرِي مَا الْكِتَابُ وَلَا الْإِيمَانُ وَلَٰكِن جَعَلْنَاهُ نُورًا نَّهْدِي بِهِ مَن نَّشَاءُ مِنْ عِبَادِنَا ۚ وَإِنَّكَ لَتَهْدِي إِلَىٰ صِرَاطٍ مُّسْتَقِيمٍ ﴿٥٣﴾

53. තවද මෙලෙස අපගේ විධානයෙන් අපි ඔබට ශුද්ධ වූ වදන අනාවරණය කර ඇත්තෙමු. ග්‍රන්ථය කුමක්ද යන්නත් විශ්වාසය කුමක්ද යන්නත් ඔබ දැන නොසිටියෙහිය. නමුත් අපි එය (අනාවරණය) ආලෝකමත් කර ඇත්තෙමු. එමගින් අප අභිමත වන පරිදි අපගේ දාසයින් හට අපි මග පෙන්වන්නෙමු. තවද ඇත්තෙන්ම ඔබ (මිනිස් වර්ගයාව) සෘජු මගට යොමු කරන්නෙහිය.

54. (එනම්) අල්ලාහ්ගේ මාර්ගය (වෙතටය). අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද අයත්වන්නේ ඔහුටය. බලනු! අල්ලාහ් වෙතටම සියළු කටයුතු ආපසු පැමිණෙන්නේය.

صِرَاطِ اللّٰهِ الَّذِىْ لَهٗ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الْاَرْضِ ؕ اَلَاۤ اِلَى اللّٰهِ تَصِيْرُ الْاُمُوْرُ ۟



අල් zසුක්රුෆ්
මක්කාහිදී පහළ වූවකි

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ②

2. හා, මීම්.◆

وَالۡكِتٰبِ الۡمُبِيۡنِ ③

3. පැහැදිලි කරන්නාවූ මෙම ග්‍රන්ථය මත දිවුරමින්,

اِنَّا جَعَلۡنٰهُ قُرۡءٰنًا عَرَبِيًّا لَّعَلَّكُمۡ تَعۡقِلُوۡنَ ④

4. නුඹලා වටහාගනු පිණිස, අපි විස්තරාත්මක (අරාබි) භාෂාවෙන් මෙම කුර්ආනය (පහළ) කළෙමු.

وَاِنَّهٗ فِىۡۤ اُمِّ الۡكِتٰبِ لَدَيۡنَا لَعَلِىٌّ حَكِيۡمٌ ⑤

*5. තවද නියතවශයෙන්ම මෙය මව් ග්‍රන්ථයෙහි (සුරක්ෂිත)ය. අති උසස්ය, ප්‍රඥාවෙන් පරිපූර්ණය.

اَفَنَضۡرِبُ عَنۡكُمُ الذِّكۡرَ صَفۡحًا اَنۡ كُنۡتُمۡ قَوۡمًا مُّسۡرِفِيۡنَ ⑥

6. නුඹලා සීමාව ඉක්මවූ ජනතාවක් බැවින්, අපි (නුඹලාව) නොසලකා හරිමින් අනුශාසනාව නුඹලාගෙන් ඉවත් කරන්නෙමුද?

وَكَمۡ اَرۡسَلۡنَا مِنۡ نَّبِىٍّ فِى الۡاَوَّلِيۡنَ ⑦

7. තවද කෙතරම් වක්තෘවරුන්ව අපි පෙරවූ ජනතාවන් අතරට එව්වෙමුද!

وَمَا يَاۡتِيۡهِمۡ مِّنۡ نَّبِىٍّ اِلَّا كَانُوۡا بِهٖ يَسۡتَهۡزِءُوۡنَ ⑧

8. නමුත් ඔවුන් වෙත කිසිදු වක්තෘවරයෙක් ඔවුන් ඔහුට සරදම් කළා මිස පැමිණියේ නැත.

فَاَهۡلَكۡنَاۤ اَشَدَّ مِنۡهُمۡ بَطۡشًا وَّمَضٰى

9. තවද අපි මොවුන්ට වඩා දැඩි

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

* සටහන. 5: 'උම්මුල් කිතාබ්' (මව් ග්‍රන්ථය) යන පදය පොදුවේ ශුද්ධ වූ කුර්ආනයේ මුල් පරිච්ඡේදය වන අල්-ෆාතිහා යන පරිච්ඡේදය දැක්වීමට උපයෝගි කෙරේ. එය කුර්ආනයේ මූලික ඉගැන්වීම් සහ ගුණාංගයන්හි බීජයක් මෙන්ය. නමුත් මෙහිදී මෙය මනුෂ්‍යා විසින් අගමුල මුළුමනින්ම සොයා ගත නොහැකි එක්තරා විධියේ දෙවියන් සතු දිව්‍ය ග්‍රන්ථයෙහි නිශ්චිත සැලැස්මක පිටපතක් මෙන් පෙනියයි.

| | |
|---|---|
| ශක්තිමත් අයව විනාශ කළෙමු. තවද පැරණි ජනතාවන්ගේ උපමාවන් ඉකුත් වී හමාරය. | مَثَلُ الْاَوَّلِيْنَ ۝٩ |
| 10. තවද ඔබ ඔවුන්ගෙන්, 'අහස් සහ පොළොව මැව්වේ කවුරුන්ද?'යි ඇසුවේ නම් ඔවුන්, 'බලසම්පන්න වූද සියල්ල දන්නා වූද (දෙවියන්) ඒවා මැව්වේයැ'යි නියතවශයෙන් කියන්නෝය. | وَلَئِنْ سَاَلْتَهُمْ مَّنْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ لَيَقُوْلُنَّ خَلَقَهُنَّ الْعَزِيْزُ الْعَلِيْمُ ۝١٠ |
| 11. නුඹලාට පොළොව තොටිල්ලක් කළේ ඔහුමය. තවද නුඹලා යහමග අනුගමනය කරනු පිණිස නුඹලා වෙනුවෙන් එහි මංමාවත් ඇති කළේය. | الَّذِىْ جَعَلَ لَكُمُ الْاَرْضَ مَهْدًا وَّجَعَلَ لَكُمْ فِيْهَا سُبُلًا لَّعَلَّكُمْ تَهْتَدُوْنَ ۝١١ |
| 12. තවද අහසින් නියමිත ප්‍රමාණයෙන් ජලය පහළ කරන්නේ ඔහුය. තවද අපි එමගින් මළ භූමියට ජීවය දෙන්නෙමු. එලෙසම නුඹලා (යළි ජීවය ලබා) නැගිටවනු ලබන්නෙහුය. | وَالَّذِىْ نَزَّلَ مِنَ السَّمَآءِ مَآءًۢ بِقَدَرٍ ۚ فَاَنْشَرْنَا بِهٖ بَلْدَةً مَّيْتًا ۚ كَذٰلِكَ تُخْرَجُوْنَ ۝١٢ |
| 13. තවද සියල්ල ජෝඩු වශයෙන් මවා ඇත්තේ ඔහුය. තවද නුඹලා ගමන් ගනු පිණිස නැව්ද ගව සතුන්ද නුඹලා වෙනුවෙන් ඇති කළේය. | وَالَّذِىْ خَلَقَ الْاَزْوَاجَ كُلَّهَا وَجَعَلَ لَكُمْ مِّنَ الْفُلْكِ وَالْاَنْعَامِ مَا تَرْكَبُوْنَ ۝١٣ |
| 14. එය නුඹලා උන්ගේ පිට මත ස්ථිරව අසුන් ගනු පිණිසය. පසුව නුඹලා එය මත ස්ථිරව අසුන් ගත් විට නුඹලා තම අධිපතියාණන්ගේ අනුග්‍රහය සිහිපත් කරනු. තවද නුඹලා, 'අපට මේවා සේවය සඳහා යොදවා ඇති ඔහු පාරිශුද්ධය. නමුත් අපි මේවා පාලනය කර ගත හැක්කන් නොවන්නෙමු'යි පවසනු. | لِتَسْتَوٗا عَلٰى ظُهُوْرِهٖ ثُمَّ تَذْكُرُوْا نِعْمَةَ رَبِّكُمْ اِذَا اسْتَوَيْتُمْ عَلَيْهِ وَتَقُوْلُوْا سُبْحٰنَ الَّذِىْ سَخَّرَ لَنَا هٰذَا وَمَا كُنَّا لَهٗ مُقْرِنِيْنَ ۝١٤ |
| 15. 'තවද නියතවශයෙන්ම අපි අපගේ අධිපතියාණන් වෙත ආපසු යන්නන් වෙමු'. | وَاِنَّاۤ اِلٰى رَبِّنَا لَمُنْقَلِبُوْنَ ۝١٥ |
| 16. තවද ඔවුන් ඔහුගේ දාසයින්ගෙන් සමහරෙකුව ඔහු වෙනුවෙන් | وَجَعَلُوْا لَهٗ مِنْ عِبَادِهٖ جُزْءًا ۭ اِنَّ |

إِنَّ الْإِنسَانَ لَكَفُورٌ مُّبِينٌ ﴿١٦﴾

කොටසක් ලෙස නියම කළහ. ඇත්තෙන්ම මිනිසා ප්‍රත්‍යක්ෂ අකෘතඥය.

أَمِ اتَّخَذَ مِمَّا يَخْلُقُ بَنَاتٍ وَأَصْفَاكُم بِالْبَنِينَ ﴿١٧﴾

17. ඔහු මවා ඇති දෙයින් තමාට දූවරුන්ව ගෙන නුඹලාව පුතුන් මගින් ගරුත්වයට පත් කළේද?

وَإِذَا بُشِّرَ أَحَدُهُم بِمَا ضَرَبَ لِلرَّحْمَٰنِ مَثَلًا ظَلَّ وَجْهُهُ مُسْوَدًّا وَهُوَ كَظِيمٌ ﴿١٨﴾

18. එහෙත් මහා කාරුණික (දෙවියන්ට) ආරෝපණය කරන දේ මෙන් යමක් පිළිබඳව ඔවුන්ගෙන් කෙනෙකුට ආරංචි දෙනු ලැබූ විට, ඔහුගේ මුහුණ අඳුරුවී, ඔහු දුකෙන් පෙළෙන්නේය.

أَوَمَن يُنَشَّأُ فِي الْحِلْيَةِ وَهُوَ فِي الْخِصَامِ غَيْرُ مُبِينٍ ﴿١٩﴾

19. ආභරණ අතර හදා වඩා ගනු ලද්දාවූද තර්කයෙහි පැහැදිලි කළ නොහැකිවූද අයව (නුඹලා දෙවියන්ට ආරෝපණය කරන්නෙහු)ද?

وَجَعَلُوا الْمَلَائِكَةَ الَّذِينَ هُمْ عِبَادُ الرَّحْمَٰنِ إِنَاثًا ۚ أَشَهِدُوا خَلْقَهُمْ ۚ سَتُكْتَبُ شَهَادَتُهُمْ وَيُسْأَلُونَ ﴿٢٠﴾

20. තවද මහා කාරුණික (දෙවියන්)ගේ දාසයින් වන සුර දූතයින්ව ස්ත්‍රීන් යැයි ඔවුන් වර්ණනා කරති. ඔවුන්ගේ මැවීම සම්බන්ධව මොවුහු සාක්ෂි දරන්නෝද? එසේනම් ඔවුන්ගේ සාක්ෂි සටහන් කරනු ලබන්නේය. තවද ඔවුහු ප්‍රශ්ණ කරනු ලබන්නෝය.

وَقَالُوا لَوْ شَاءَ الرَّحْمَٰنُ مَا عَبَدْنَاهُم ۗ مَّا لَهُم بِذَٰلِكَ مِنْ عِلْمٍ ۖ إِنْ هُمْ إِلَّا يَخْرُصُونَ ﴿٢١﴾

21. තවද ඔවුහු, 'මහා කාරුණික (දෙවියන්) අභිමත වූවා නම්, අපි ඔවුනට වැඳුම් පිදුම් නොකරන්නට තිබුණි'යි කියති. ඒ පිළිබඳව කිසිදු දැනුමක් ඔවුනට නොමැත. ඔවුන් අනුමාන කරනවා මිස අන්දෙයක් නැත.

أَمْ آتَيْنَاهُمْ كِتَابًا مِّن قَبْلِهِ فَهُم بِهِ مُسْتَمْسِكُونَ ﴿٢٢﴾

22. අප මෙ(කුර්ආන)යට පෙර ඔවුනට ශුද්ධ ලියවිල්ලක් ලබා දී ඔවුන් එය තදින් ග්‍රහණය කරමින් සිටින්නෝද?

بَلْ قَالُوا إِنَّا وَجَدْنَا آبَاءَنَا عَلَىٰ أُمَّةٍ وَإِنَّا

23. නොඑසේය ඔවුහු, 'අපගේ පියවරුන් (නියත) මාර්ගයක් අනුගමනය කරනු අපි දුටුවෙමු. තවද

عَلٰۤى اٰثٰرِهِمْ مُّهْتَدُوْنَ ۝٢٣

අපි ඔවුන්ගේ අඩිපාර මගින් මග පෙන්වනු ලැබුවෙමු'යි කියති.

وَكَذٰلِكَ مَاۤ اَرْسَلْنَا مِنْ قَبْلِكَ فِىْ قَرْيَةٍ مِّنْ نَّذِيْرٍ اِلَّا قَالَ مُتْرَفُوْهَاۤ ۙ اِنَّا وَجَدْنَاۤ اٰبَآءَنَا عَلٰۤى اُمَّةٍ وَّاِنَّا عَلٰۤى اٰثٰرِهِمْ مُّقْتَدُوْنَ ۝٢٤

24. තවද මෙලෙස අපි ඔබට පෙර යම් ජනාවාසයකට, එහි සිටි සෞභාග්‍යමත් අය, 'අපගේ මුතුන් මිත්තන් (නියත) මාර්ගයක් අනුගමනය කරනු අපි දුටුවෙමු. තවද අපි ඔවුන්ගේ අඩිපාර අනුගමනය කරන්නන් වෙමු'යි කිවා මිස කිසිම අවවාදකරුවෙකුව අපි එවා නැත්තෙමු.

قٰلَ اَوَلَوْ جِئْتُكُمْ بِاَهْدٰى مِمَّا وَجَدْتُّمْ عَلَيْهِ اٰبَآءَكُمْ ؕ قَالُوْۤا اِنَّا بِمَاۤ اُرْسِلْتُمْ بِهٖ كٰفِرُوْنَ ۝٢٥

25. (ඔවුන්ගේ අවවාදකරුවා), 'කිමද! නුඹලා දුටු නුඹලාගේ පියවරුන් සිටි මගට වඩා හොඳ දෙයක් මා නුඹලාට ගෙනැවිත් තිබියදීදැ?'යි පැවසුවේය. (එයට) ඔවුහු, 'නිශ්චිතවම කුමක් සමග නුඹ එවනු ලැබුවේද ඒ කෙරෙහි අපි අවිශ්වාස කරන්නන් වෙමු'යි කීහ.

فَانْتَقَمْنَا مِنْهُمْ فَانْظُرْ كَيْفَ كَانَ عَاقِبَةُ الْمُكَذِّبِيْنَ ۝٢٦

26. එබැවින් අපි ඔවුන්ගෙන් නිවැරදිව පළි ගත්තෙමු. පසුව (වක්තෘවරුන්ව) ප්‍රතික්ෂේප කළ අයගේ අවසානය කෙසේ වූයේ දැයි බලනු!

وَاِذْ قَالَ اِبْرٰهِيْمُ لِاَبِيْهِ وَقَوْمِهٖۤ اِنَّنِىْ بَرَآءٌ مِّمَّا تَعْبُدُوْنَ ۝٢٧

27. තවද ඉබ්රාහීම් ඔහුගේ පියා සහ ඔහුගේ ජනතාව වෙත, 'මා (ස්ථිරවම) නුඹලා වැඳුම් පිදුම් කරන දෙයින් නිදොස් යැ'යි කියූ අවස්ථාව (සිහිපත් කරනු).

اِلَّا الَّذِىْ فَطَرَنِىْ فَاِنَّهٗ سَيَهْدِيْنِ ۝٢٨

28. 'නමුත් මාව මැවූ ඔහු හැරය. තවද ඔහු නියතවශයෙන්ම මා හට මග පෙන්වන්නේය'

وَجَعَلَهَا كَلِمَةًۢ بَاقِيَةً فِىْ عَقِبِهٖ لَعَلَّهُمْ يَرْجِعُوْنَ ۝٢٩

29. තවද ඔහුගෙන්(ඉබ්රාහීම්ගෙන්) පැවත එන්නන් (දෙවියන්) වෙතට හැරෙනු පිණිස ඔහු එය ස්ථිර වූ ආදර්ශමත් සළකුණක් කළේය.

بَلْ مَتَّعْتُ هٰۤؤُلَآءِ وَاٰبَآءَهُمْ حَتّٰى

30. එහෙත් මා ඔවුන් වෙත සත්‍යය සහ පැහැදිලි කරන්නාවූ දූතයෙකු

جَآءَهُمُ الْحَقُّ وَرَسُوْلٌ مُّبِيْنٌ ﴿٣٠﴾

පැමිණෙන තුරු මම ඔවුන්වද ඔවුන්ගේ පියවරුන්වද (තාවකාලිකව) භුක්ති විඳීමට ඉඩ හැරියෙමි.

وَلَمَّا جَآءَهُمُ الْحَقُّ قَالُوْا هٰذَا سِحْرٌ وَّاِنَّا بِهٖ كٰفِرُوْنَ ﴿٣١﴾

31. නමුත්, සත්‍යය ඔවුන් වෙතට පැමිණි විට, 'මෙය මායාවකි. තවද අපි එය ප්‍රතික්ෂේප කරන්නන් වෙමු'යි ඔවුන් කීහ.

وَقَالُوْا لَوْلَا نُزِّلَ هٰذَا الْقُرْاٰنُ عَلٰى رَجُلٍ مِّنَ الْقَرْيَتَيْنِ عَظِيْمٍ ﴿٣٢﴾

32. තවද ඔවුහු, 'නගර දෙකෙහි යම් ශ්‍රේෂ්ඨ මිනිසෙකුට මෙම කුර්ආනය පහළ නොකරන ලද්දේ මන්දැ?'යි අසති.

اَهُمْ يَقْسِمُوْنَ رَحْمَتَ رَبِّكَ ؕ نَحْنُ قَسَمْنَا بَيْنَهُمْ مَّعِيْشَتَهُمْ فِى الْحَيٰوةِ الدُّنْيَا وَرَفَعْنَا بَعْضَهُمْ فَوْقَ بَعْضٍ دَرَجٰتٍ لِّيَتَّخِذَ بَعْضُهُمْ بَعْضًا سُخْرِيًّا ؕ وَرَحْمَتُ رَبِّكَ خَيْرٌ مِّمَّا يَجْمَعُوْنَ ﴿٣٣﴾

33. ඔබගේ අධිපතියාණන්ගේ දයාව බෙදා දෙන්නේ ඔවුන්ද? මෙලොව ජීවිතයෙහි ඔවුන්ගේ ජීවනෝපාය ඔවුනතර බෙදා දෙන්නේ අපිමය. තවද අපි ඔවුන්ගෙන් සමහරෙකුව සමහරෙකුට වඩා තරාතිරම්හි උසස් කරන්නෙමු. එහෙත්, අහෝ! දුකකි! මෙහි ප්‍රතිඵලයක් වශයෙන් හුදෙක් සමහරුන් තවත් සමහරුන්ව යටත් කරගනිති. තවද ඔබගේ අධිපතියාණන්ගේ දයාව ඔවුන් රැස් කරන දේට වඩා ශ්‍රේෂ්ඨය.

وَلَوْلَاۤ اَنْ يَّكُوْنَ النَّاسُ اُمَّةً وَّاحِدَةً لَّجَعَلْنَا لِمَنْ يَّكْفُرُ بِالرَّحْمٰنِ لِبُيُوْتِهِمْ سُقُفًا مِّنْ فِضَّةٍ وَّ مَعَارِجَ عَلَيْهَا يَظْهَرُوْنَ ﴿٣٤﴾

34. තවද මිනිස් වර්ගයා (සියල්ලන්ම) එකම (විධියේ) ජනතාවක් නොවී සිටින්නට, මහා කාරුණික (දෙවියන්) කෙරෙහි අවිශ්වාස කරන්නන්හට ඔවුන්ගේ නිවෙස්හි වහලයන් රිදී ලෙසද ඔවුන් උඩට යනු පිණිස (රිදීවලින්) පඩිපෙළද අප ලබා දෙන්නට තිබුණි.

وَلِبُيُوْتِهِمْ اَبْوَابًا وَّ سُرُرًا عَلَيْهَا يَتَّكِـُٔوْنَ ﴿٣٥﴾

35. තවද ඔවුන්ගේ නිවෙස්හි දොරවල්ද ඔවුන්ට ඒ මත හාන්සි විය හැකි සයනයන්ද (රිදී වලින් සාදා දෙන්නට තිබුණි).

وَزُخْرُفًا ؕ وَاِنْ كُلُّ ذٰلِكَ لَمَّا مَتَاعُ

36. තවද රන් සැරසිලිද (දෙන්නට තිබුණි). නමුත් මේ සියල්ල මෙලෝ ජීවිතයේ (තාවකාලික) ජීවනෝපාය

| | |
|---|---|
| الْحَيٰوةِ الدُّنْيَا ۗ وَالْاٰخِرَةُ عِنْدَ رَبِّكَ لِلْمُتَّقِيْنَ ﴿٣٥﴾ | මිස අන් කිසිවක් නොවේ. තවද ඔබ අධිපතියාණන් සතු පරලොව (සැපත) බියබැතිමතුන් හටය. |
| وَمَنْ يَّعْشُ عَنْ ذِكْرِ الرَّحْمٰنِ نُقَيِّضْ لَهٗ شَيْطٰنًا فَهُوَ لَهٗ قَرِيْنٌ ﴿٣٦﴾ | 37. තවද කවරෙකු හෝ මහා කාරුණික (දෙවියන්)ව සිහිකිරීමෙන් ඉවත හැරෙන්නේද අපි ඔහුට ෂෙයිතාන්ව නියම කරන්නෙමු. ඔහු මොහුගේ සගයෙකු වන්නේය. |
| وَاِنَّهُمْ لَيَصُدُّوْنَهُمْ عَنِ السَّبِيْلِ وَيَحْسَبُوْنَ اَنَّهُمْ مُّهْتَدُوْنَ ﴿٣٧﴾ | 38. තවද නියතවශයෙන්ම මොවුන් (ෂෙයිතානුන්) ඔවුන්ව (දෙවියන්ගේ) මාර්ගයෙන් වළක්වන්නෝය. නමුත් ඔවුන් යහමග ලද්දන් යැයි සිතන්නෝය. |
| حَتّٰٓى اِذَا جَآءَنَا قَالَ يٰلَيْتَ بَيْنِيْ وَبَيْنَكَ بُعْدَ الْمَشْرِقَيْنِ فَبِئْسَ الْقَرِيْنُ ﴿٣٨﴾ | 39. අවසානයේදී එවැන්නෙකු අප වෙත පැමිණෙන විට, 'මා සහ නුඹ අතර දුර නැගෙනහිර සහ බටහිර අතර ඇති දුරක් වුවා නම්!' යැයි (ඔවුන්ගේ සගයාට) පවසන්නේය. ඔහු කෙතරම් නපුරු සගයෙක්ද! |
| وَلَنْ يَّنْفَعَكُمُ الْيَوْمَ اِذْ ظَّلَمْتُمْ اَنَّكُمْ فِى الْعَذَابِ مُشْتَرِكُوْنَ ﴿٣٩﴾ | 40. 'නුඹලා සීමාව ඉක්මවා ගිය හෙයින් මෙදින නුඹලාට කිසිදු ඵලක් නොවනු ඇත. නියතවශයෙන්ම නුඹලා දඬුවමෙහි සහකරුවන් වන්නෙහුය'. |
| اَفَاَنْتَ تُسْمِعُ الصُّمَّ اَوْ تَهْدِى الْعُمْىَ وَمَنْ كَانَ فِىْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٤٠﴾ | 41. එසේ නම්, ඔබට බිහිරන්ට ඇසීමට සැලැස්වීමට හෝ අන්ධයින්ට සහ ප්‍රත්‍යක්ෂ නොමගෙහි ඇති කෙනෙකුට මග පෙන්වීමට හැකිද? |
| فَاِمَّا نَذْهَبَنَّ بِكَ فَاِنَّا مِنْهُمْ مُّنْتَقِمُوْنَ ﴿٤١﴾ | 42. තවද අප ඔබව අත්පත් කරගන්නේ නම්, නියතවශයෙන්ම අපි ඔවුන්ගෙන් නිවැරදිව පළිගන්නෙමු. |
| اَوْ نُرِيَنَّكَ الَّذِيْ وَعَدْنٰهُمْ فَاِنَّا عَلَيْهِمْ مُّقْتَدِرُوْنَ ﴿٤٢﴾ | 43. නැතහොත් ඔවුන්ට අප පොරොන්දු වූ දේ අපි ඔබට පෙන්වන්නෙමු. නියතවශයෙන්ම අපහට ඔවුන් කෙරෙහි පරිපූර්ණ බලය ඇත. |

| | |
|---|---|
| 44. එබැවින් ඔබ වෙත අනාවරණය කරන ලද දේ දැඩිව ග්‍රහණය කරගන්න. නියතවශයෙන්ම ඔබ ඍජු මාර්ගයෙහිය. | فَاسْتَمْسِكْ بِالَّذِيٓ اُوْحِيَ اِلَيْكَ ۚ اِنَّكَ عَلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٤٤﴾ |
| 45. තවද ඇත්තෙන්ම මෙය ඔබටද ඔබගේ ජනතාවටද සිහි ගැන්වීමකි. තවද නුඹලා ප්‍රශ්ණ කරනු ලබන්නෙහුය. | وَاِنَّهٗ لَذِكْرٌ لَّكَ وَلِقَوْمِكَ ۚ وَسَوْفَ تُسْـَٔلُوْنَ ﴿٤٥﴾ |
| 46. තවද අපි ඔබට පෙර කවුරුන්ව දූතයින් ලෙස එව්වෙමුද ඔවුන්ගෙන්, 'මහා කාරුණික (දෙවියන්) හැර නැමදුම් කරනු ලබන්නට වෙනත් දෙවිවරුන්ව අපි ඇති කළෙමුදැ?'යි අසන්න. | وَسْـَٔلْ مَنْ اَرْسَلْنَا مِنْ قَبْلِكَ مِنْ رُّسُلِنَآ اَجَعَلْنَا مِنْ دُوْنِ الرَّحْمٰنِ اٰلِهَةً يُّعْبَدُوْنَ ﴿٤٦﴾ |
| 47. තවද අපි මූසාව ෆිර්අවුන් සහ ඔහුගේ ප්‍රධානීන් වෙතට අපගේ සළකුණු සමග එව්වෙමු. තවද ඔහු 'ඇත්තෙන්ම මම සර්ව ලෝකයන්හි අධිපතියාණන්ගේ දූතයෙක් වෙමි'යි පැවසුවේය. | وَلَقَدْ اَرْسَلْنَا مُوْسٰى بِاٰيٰتِنَآ اِلٰى فِرْعَوْنَ وَمَلَا۟ئِهٖ فَقَالَ اِنِّيْ رَسُوْلُ رَبِّ الْعٰلَمِيْنَ ﴿٤٧﴾ |
| 48. එහෙත්, ඔහු අපගේ සළකුණු ඔවුන් වෙතට ගෙන ආ විට, එසැනින්ම, ඔවුන් ඒවාට සිනාසෙමින් සිටියහ. | فَلَمَّا جَآءَهُمْ بِاٰيٰتِنَآ اِذَا هُمْ مِّنْهَا يَضْحَكُوْنَ ﴿٤٨﴾ |
| 49. තවද අපි ඔවුනට පෙන්වූ කිසිදු සළකුණක් එබඳු දේට වඩා ඉමහත්ව මිස නොපෙන්වූයෙමු. තවද ඔවුන් (අප වෙත) හැරෙනු පිණිස අපි ඔවුන්ව දඬුවමකින් හසුකරගත්තෙමු. | وَمَا نُرِيْهِمْ مِّنْ اٰيَةٍ اِلَّا هِيَ اَكْبَرُ مِنْ اُخْتِهَا ۫ وَاَخَذْنٰهُمْ بِالْعَذَابِ لَعَلَّهُمْ يَرْجِعُوْنَ ﴿٤٩﴾ |
| 50. තවද ඔවුහු, 'එම්බා මායාකරුවනි! ඔබගේ අධිපතියාණන්ව, ඔහු ඔබ සමග ප්‍රතිඥා කළ දේ අනුව අප සඳහා අයැදින්න. එවිට අපි නියතවශයෙන්ම මගපෙන්වීම පිළිගන්නෙමු'යි කීහ. | وَقَالُوْا يٰٓاَيُّهَ السّٰحِرُ ادْعُ لَنَا رَبَّكَ بِمَا عَهِدَ عِنْدَكَ ۚ اِنَّنَا لَمُهْتَدُوْنَ ﴿٥٠﴾ |

فَلَمَّا كَشَفْنَا عَنْهُمُ الْعَذَابَ إِذَا هُمْ يَنْكُثُونَ ﴿٥١﴾

51. නමුත් අප ඔවුන්ගෙන් දඬුවම ඉවත් කළ විට, එසැනින්ම ඔවුන් තමන්ගේ පොරොන්දුව කඩ කළහ.

وَنَادَىٰ فِرْعَوْنُ فِي قَوْمِهِ قَالَ يَا قَوْمِ أَلَيْسَ لِي مُلْكُ مِصْرَ وَهَٰذِهِ الْأَنْهَارُ تَجْرِي مِنْ تَحْتِي ۖ أَفَلَا تُبْصِرُونَ ﴿٥٢﴾

52. තවද ෆිර්අවුන් (මෙසේ) පවසමින් තම ජනතාවට නිවේදනය කළේය, 'එම්බල මාගේ ජනතාවනි! මිසරයේ රාජ්‍යය සහ මා යටතේ ගලාබසිනා මේ දියදහරාවන් මා හට අයත් නොවේද? එසේනම් නුඹලා නොදකින්නෙහුද?'

أَمْ أَنَا خَيْرٌ مِنْ هَٰذَا الَّذِي هُوَ مَهِينٌ وَلَا يَكَادُ يُبِينُ ﴿٥٣﴾

53. 'නැතහොත් ඉතා තුච්ඡ සහ පැහැදිලිව කතා කළ නොහැකි මොහුට වඩා මම ශ්‍රේෂ්ඨ වෙමිද?'

فَلَوْلَا أُلْقِيَ عَلَيْهِ أَسْوِرَةٌ مِنْ ذَهَبٍ أَوْ جَاءَ مَعَهُ الْمَلَائِكَةُ مُقْتَرِنِينَ ﴿٥٤﴾

54. 'එමෙන්ම ඔහුට රන් වළලු නොදමන ලද්දේ මන්ද? නැතහොත් ඔහු සමග පිරිවරාගෙන සිටින සුරදූතයින් නොපැමිණියේ මන්ද?'

فَاسْتَخَفَّ قَوْمَهُ فَأَطَاعُوهُ ۚ إِنَّهُمْ كَانُوا قَوْمًا فَاسِقِينَ ﴿٥٥﴾

55. මෙලෙස ඔහු තම ජනතාවට (තම වාසිය තකා) මුලා කළේය. තවද ඔවුන් ඔහුට අවනත වූහ. ඇත්තෙන්ම ඔවුන් දුෂ්ඨ ජනතාවක් වූහ.

فَلَمَّا آسَفُونَا انْتَقَمْنَا مِنْهُمْ فَأَغْرَقْنَاهُمْ أَجْمَعِينَ ﴿٥٦﴾

56. එබැවින්, ඔවුන් අපව කෝපයට පත් කළ කල්හි අපි ඔවුන්ගෙන් නිවැරදිව පළිගෙන ඔවුන් සියල්ලව ගිල්වූයෙමු.

فَجَعَلْنَاهُمْ سَلَفًا وَمَثَلًا لِلْآخِرِينَ ﴿٥٧﴾

57. තවද අපි ඔවුන්ව හුදු පෙර සිද්ධියක් බවටද මතු පරපුරට නිදර්ශනයක් ලෙසද කළෙමු.

وَلَمَّا ضُرِبَ ابْنُ مَرْيَمَ مَثَلًا إِذَا قَوْمُكَ مِنْهُ يَصِدُّونَ ﴿٥٨﴾

58. තවද මරියම්ගේ පුත්‍රයාව උපමාවක් ලෙස සඳහන් කරනු ලැබූ විට එසැනින්ම, ඔබගේ ජනතාව ඝෝෂා කිරීමට පටන් ගන්නෝය.

وَقَالُوا أَآلِهَتُنَا خَيْرٌ أَمْ هُوَ ۚ مَا ضَرَبُوهُ لَكَ إِلَّا جَدَلًا ۚ بَلْ هُمْ قَوْمٌ خَصِمُونَ ﴿٥٩﴾

59. තවද ඔවුහු, 'අපගේ දෙවිවරු ශ්‍රේෂ්ඨද නැතහොත් ඔහුදැ?'යි කියන්නෝය. ඔවුන් ඔබට මෙය සඳහන් කරන්නේ තර්කයට මිස නැත. නොඑසේය, නමුත් ඔවුන් තර්කකාරී ජනතාවකි.

إِنْ هُوَ إِلَّا عَبْدٌ أَنْعَمْنَا عَلَيْهِ وَجَعَلْنَاهُ مَثَلًا لِّبَنِي إِسْرَائِيلَ ﴿٦٠﴾

60. ඔහු අපගේ දාසයා පමණක් විය. ඔහු කෙරෙහි අපි අපගේ අනුග්‍රහය පිරිනැමුවෙමු. තවද අපි ඉස්රාඊලයේ ජනතාවට ඔහුව ආදර්ශයක් කළෙමු.

وَلَوْ نَشَاءُ لَجَعَلْنَا مِنكُم مَّلَائِكَةً فِي الْأَرْضِ يَخْلُفُونَ ﴿٦١﴾

61. තවද අප අභිමත වුවහොත්, පොළොවෙහි නුඹලා අතුරින් සුරදූතයින්ව (එහි) පැවතෙන්නන් ලෙසට අපට පත් කරන්නට තිබුණි.

وَإِنَّهُ لَعِلْمٌ لِّلسَّاعَةِ فَلَا تَمْتَرُنَّ بِهَا وَاتَّبِعُونِ ۚ هَٰذَا صِرَاطٌ مُّسْتَقِيمٌ ﴿٦٢﴾

*62. නමුත් සැබැවින්ම ඔහු එම හෝරාවේ සළකුණක්ය. එබැවින් එය පිළිබඳව කිසිදු සැකයක් නොතබනු. නමුත් මාව අනුගමනය කරනු. මෙය ඍජු මාර්ගය වේ.

وَلَا يَصُدَّنَّكُمُ الشَّيْطَانُ ۖ إِنَّهُ لَكُمْ عَدُوٌّ مُّبِينٌ ﴿٦٣﴾

63. තවද ෂෙයිතාන් නුඹලාව නොවළක්වත්වා. නියතවශයෙන්ම ඔහු නුඹලාට ප්‍රකට සතුරෙකි.

وَلَمَّا جَاءَ عِيسَىٰ بِالْبَيِّنَاتِ قَالَ قَدْ جِئْتُكُم بِالْحِكْمَةِ وَلِأُبَيِّنَ لَكُم بَعْضَ الَّذِي تَخْتَلِفُونَ فِيهِ ۖ فَاتَّقُوا اللَّهَ وَأَطِيعُونِ ﴿٦٤﴾

64. තවද ඊසා පැහැදිලි සාධකයන් සමග පැමිණි විට ඔහු, 'ඇත්තෙන්ම මම ප්‍රඥාව සමගින් නුඹලා වෙතට පැමිණ සිටින්නෙමි. තවද නුඹලා මතභේද වූ ඇතැම් දේ මා නුඹලාට පැහැදිලි කර දීමටය. එබැවින්, අල්ලාහ් කෙරෙහි බිය බැතිමත් වනු. තවද මාහට අවනත වනු'යි කීවේය.

إِنَّ اللَّهَ هُوَ رَبِّي وَرَبُّكُمْ فَاعْبُدُوهُ ۚ هَٰذَا صِرَاطٌ مُّسْتَقِيمٌ ﴿٦٥﴾

65. 'සැබැවින්ම අල්ලාහ් වන ඔහු මාගේ අධිපතියාණන් මෙන්ම නුඹලාගේ අධිපතියාණන්ය. එබැවින් ඔහුට නමදිනු. මෙයම ඍජු මාර්ගය වේ'.

فَاخْتَلَفَ الْأَحْزَابُ مِن بَيْنِهِمْ ۖ فَوَيْلٌ

66. එහෙත් (විරුද්ධ) පාර්ශවයන් තමන් අතරම භේද ඇති කර ගත්හ.

*සටහන. 62: මෙහි 'අස් සාඅත්' යන වචනය, අල් කමර් (පරි.54:2) හි මෙම වචනයෙහි යෙදුම පසුබිම් කරගෙන වචනානුසාරයෙන් 'හෝරාව' යැයි පරිවර්තනය කර තිබීම මෙහිදී තේරුම් ගත යුතුය. එහිදී ශුද්ධවූ වක්තෘවරයාණන් වන මුහම්මද් (සල්) තුමාගේ පැමිණීමෙන් පසු සිදුවීමට නියමිත විප්ලවාකාරි විපර්යාස 'අස්සාඅත්' යන වචනයෙන් දක්වා ඇත. එමෙන්ම මෙම අධ්‍යාත්මික විප්ලවය සිදුවීමේ සාක්ෂියක් වශයෙන් සඳ දෙකඩ වීම සඳහන් කර ඇත. එබැවින් මෙම පදනම මත, මෙහිදී අධ්‍යයනය කරනු ලබන වාක්‍යයේ ඊසා (අලෛ) තුමාණන්ට මෙම පදය යෙදීම වටහා ගත යුතුය. එම නිසා 'හෝරාව' යනුවෙන් මෙහිදී සඳහන් කර ඇත්තේ අවසාන කාලයේදී ඊසාගේ පැමිණීම සහ ඉන් අනතුරුව සිදුවන අධ්‍යාත්මික විප්ලවය පිළිබඳව වේ.

لِّلَّذِينَ ظَلَمُوا مِنْ عَذَابِ يَوْمٍ أَلِيمٍ ٦٦

එමනිසා වැරදිකළ අයහට වේදනිය දිනයක දඬුවමින් වන විපතකි.

هَلْ يَنظُرُونَ إِلَّا السَّاعَةَ أَن تَأْتِيَهُم بَغْتَةً وَهُمْ لَا يَشْعُرُونَ ٦٧

67. ඔවුන් නොදැනුවත්ව සිටියදී එම හෝරාව ඔවුන් කෙරෙහි එසැනින්ම පැමිණීම මිස ඔවුන් අන් දෙයක් බලාපොරොත්තු නොවෙති.

الْأَخِلَّاءُ يَوْمَئِذٍ بَعْضُهُمْ لِبَعْضٍ عَدُوٌّ إِلَّا الْمُتَّقِينَ ٦٨

68. එදිනෙහිදී බියබැතිමතුන් හැර මිතුරන් එකිනෙකාට සතුරන් වනු ඇත.

يَا عِبَادِ لَا خَوْفٌ عَلَيْكُمُ الْيَوْمَ وَلَا أَنتُمْ تَحْزَنُونَ ٦٩

69. (අල්ලාහ් ඔවුනට මෙසේ කියනු ඇත). 'එම්බල මාගේ දාසයිනි, මෙදින නුඹලාට කිසිදු බියක් නොවනු ඇත. තවද නුඹලා ශෝකයටද පත් නොවනු ඇත'.

الَّذِينَ آمَنُوا بِآيَاتِنَا وَكَانُوا مُسْلِمِينَ ٧٠

70. 'ඔවුන් අපගේ සළකුණු කෙරෙහි විශ්වාස කොට යටහත් පහත් වූහ'.

ادْخُلُوا الْجَنَّةَ أَنتُمْ وَأَزْوَاجُكُمْ تُحْبَرُونَ ٧١

71. 'නුඹලා උද්‍යානයෙහි ඇතුළුවනු. නුඹලාද නුඹලාගේ කාලත්‍රයින්ද ගෞරවයට පාත්‍ර වී ප්‍රමෝදයට පත්කරනු ලබන්නෙහුය'.

يُطَافُ عَلَيْهِم بِصِحَافٍ مِّن ذَهَبٍ وَأَكْوَابٍ ۖ وَفِيهَا مَا تَشْتَهِيهِ الْأَنفُسُ وَتَلَذُّ الْأَعْيُنُ ۖ وَأَنتُمْ فِيهَا خَالِدُونَ ٧٢

72. රන් දීසි සහ බඳුන් ඔවුන් වටා යවනු ලබන්නේය. තවද ආත්මයන් ප්‍රිය කරන සියල්ලද ඇස් කුල්මත් වන දේද එහි තිබෙනු ඇත. 'තවද එහිම නුඹලා සදා වෙසෙනු ඇත'.

وَتِلْكَ الْجَنَّةُ الَّتِي أُورِثْتُمُوهَا بِمَا كُنتُمْ تَعْمَلُونَ ٧٣

73. 'මෙයම ස්වර්ගය වේ. නුඹලා කරමින් සිටි දේ හේතුවෙන් නුඹලා එයට උරුම කරනු ලබන්නෙහුය'.

لَكُمْ فِيهَا فَاكِهَةٌ كَثِيرَةٌ مِّنْهَا تَأْكُلُونَ ٧٤

74. 'එහි නුඹලාට බහුලව පළතුරු ඇත. නුඹලා එයින් අනුභව කරන්නෙහුය'.

إِنَّ الْمُجْرِمِينَ فِي عَذَابِ جَهَنَّمَ خَالِدُونَ ﴿٧٥﴾

75. වරදකරුවන් නිශ්චිතවම නිරයේ දඬුවමෙහි දිගුකල් වෙසෙනු ඇත.

لَا يُفَتَّرُ عَنْهُمْ وَهُمْ فِيهِ مُبْلِسُونَ ﴿٧٦﴾

76. එය ඔවුනට සැහැල්ලු නොකරනු ලබන්නේය. තවද ඔවුන් එහි බලාපොරොත්තු සුන්ව (සිර වී) සිටින්නෝය.

وَمَا ظَلَمْنَاهُمْ وَلَٰكِنْ كَانُوا هُمُ الظَّالِمِينَ ﴿٧٧﴾

77. තවද අපි ඔවුනට වැරදි නොකළෙමු. නමුත් ඔවුන් (තමන්ටම) වැරදි කරගත්තන් වූහ.

وَنَادَوْا يَا مَالِكُ لِيَقْضِ عَلَيْنَا رَبُّكَ ۖ قَالَ إِنَّكُمْ مَاكِثُونَ ﴿٧٨﴾

78. තවද ඔවුන්, 'එම්බා (නිරයේ) භාරකරුවාණෙනි! ඔබගේ අධිපතියාණන් අප විනාශ කරත්වා'යි හඬ නගන්නෝය. එයට ඔහු, 'නුඹලා රැඳී සිටිය යුතුමයැ'යි පිළිතුරු දෙන්නේය.

لَقَدْ جِئْنَاكُمْ بِالْحَقِّ وَلَٰكِنَّ أَكْثَرَكُمْ لِلْحَقِّ كَارِهُونَ ﴿٧٩﴾

79. 'නිශ්චිතවම අපි නුඹලාහට සත්‍යය ගෙනආවෙමු. නමුත් නුඹලාගෙන් බොහෝ අය සත්‍යයට වෛර කළෙහුයැ'(යි දෙවියන් පවසන්නේය).

أَمْ أَبْرَمُوا أَمْرًا فَإِنَّا مُبْرِمُونَ ﴿٨٠﴾

80. ඔවුන් යම්කිසි මාර්ගයක් අදිටන් කර තිබේද? එසේ නම් අපිද අදිටන් කරන්නන් වෙමු.

أَمْ يَحْسَبُونَ أَنَّا لَا نَسْمَعُ سِرَّهُمْ وَنَجْوَاهُمْ ۚ بَلَىٰ وَرُسُلُنَا لَدَيْهِمْ يَكْتُبُونَ ﴿٨١﴾

81. ඔවුන්ගේ රහස් සහ ඔවුන්ගේ කුට සාකච්ඡාවන් අප නොඇසන්නේ යැයි ඔවුන් සිතන්නේද? නොඑසේය, තවද අපගේ පණිවිඩකරුවන් ඔවුන් ගැන (සියල්ල) සටහන් කර තබා ගන්නෝය.

قُلْ إِنْ كَانَ لِلرَّحْمَٰنِ وَلَدٌ فَأَنَا أَوَّلُ الْعَابِدِينَ ﴿٨٢﴾

82. පවසන්න, 'මහා කාරුණික (දෙවි)යාණන්ට පුතෙකු සිටියේ නම්, (ඔහුට) නැමදුම් කරන්නන්ගෙන් ප්‍රථමයා මම වෙමි'.

سُبْحَانَ رَبِّ السَّمَاوَاتِ وَالْأَرْضِ

83. (අල්ලාහ්) පරිශුද්ධය. අහස් සහ

رَبِّ الْعَرْشِ عَمَّا يَصِفُوْنَ ﴿٨٣﴾

පොළොවේ අධිපතියාණන්ය. සිංහාසනයේ අධිපතියාණන්ය. තවද ඔවුන් (ඔහුට) ආරෝපණය කරන සියළු දෙයින් (ඔහු පරිශුද්ධය).

فَذَرْهُمْ يَخُوْضُوْا وَيَلْعَبُوْا حَتّٰى يُلٰقُوْا يَوْمَهُمُ الَّذِىْ يُوْعَدُوْنَ ﴿٨٤﴾

84. එබැවින්, ඔවුන්ට පොරොන්දු දෙනු ලැබූ ඔවුන්ගේ දිනය ඔවුන් හමුවනතුරු නිෂ්ඵල කතාවෙහි නියැලීමටද විනෝදාත්මක ක්‍රියාවේ යෙදීමටද ඔවුන්ව නිදැල්ලේ ඉඩ හරින්න.

وَهُوَ الَّذِىْ فِى السَّمَآءِ اِلٰهٌ وَّفِى الْاَرْضِ اِلٰهٌ ؕ وَهُوَ الْحَكِيْمُ الْعَلِيْمُ ﴿٨٥﴾

85. තවද අහසෙහි නැමදීමට සුදුස්සාද පොළොවෙහි නැමදීමට සුදුස්සාද ඔහුමය. තවද ඔහු ප්‍රඥාසම්පන්නය, සියල්ල දත්තාය.

وَتَبٰرَكَ الَّذِىْ لَهٗ مُلْكُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَيْنَهُمَا ۚ وَعِنْدَهٗ عِلْمُ السَّاعَةِ ۚ وَاِلَيْهِ تُرْجَعُوْنَ ﴿٨٦﴾

86. අහස් සහ පොළොවේද ඒවා අතර ඇති සියල්ලේද රාජධානිය හිමි වන ඔහු ආශිර්වාදයෙන් පරිපූර්ණය. තවද එම හෝරාවේ දැනුම ඔහු වෙතය. තවද ඔහු වෙතම නුඹලා ආපසු ගෙනඑනු ලබන්නෙහුය.

وَلَا يَمْلِكُ الَّذِيْنَ يَدْعُوْنَ مِنْ دُوْنِهِ الشَّفَاعَةَ اِلَّا مَنْ شَهِدَ بِالْحَقِّ وَهُمْ يَعْلَمُوْنَ ﴿٨٧﴾

87. තවද ඔහු හැර ඔවුන් කැඳවන අයට මැදිහත්වීමේ කිසිම බලයක් හිමි නොවන්නේය. නමුත් කවුරුන් සත්‍යයට සාක්ෂි දරන්නේද ඔවුන් හැරය. තවද ඔවුහු දන්නෝය.

وَلَئِنْ سَاَلْتَهُمْ مَّنْ خَلَقَهُمْ لَيَقُوْلُنَّ اللّٰهُ فَاَنّٰى يُؤْفَكُوْنَ ﴿٨٨﴾ۙ

88. තවද ඔබ ඔවුන්ගෙන් 'ඔවුන්ව මැව්වේ කවුරුන්ද?'යි ඇසුවහොත් ඔවුන් 'අල්ලාහ්යැ'යි කියනු ඇත. එසේනම් ඔවුන් කොහේ හරවනු ලබන්නෝද?

وَقِيْلِهٖ يٰرَبِّ اِنَّ هٰٓؤُلَآءِ قَوْمٌ لَّا يُؤْمِنُوْنَ ﴿٨٩﴾ۘ

89. 'මාගේ අධිපතියාණෙනි! මොවුන් විශ්වාස නොකරන ජනතාවක්'යන ඔහුගේ (යළි යළි නගන) හඬ මත සාක්කි!

فَاصْفَحْ عَنْهُمْ وَقُلْ سَلٰمٌ ؕ فَسَوْفَ يَعْلَمُوْنَ ﴿٩٠﴾ ع

90. එබැවින් ඔබ ඉවසා ඔවුන්ගෙන් ඉවත්ව සිටින්න. තවද 'සාමය' යැයි පවසන්න. තවද ඉක්මනින් ඔවුන් දැනගනු ඇත.




අල් දුඛාන්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ۚ ②

2. හා, මීම්.◆

وَالْكِتٰبِ الْمُبِيْنِ ۙ ③

معانقة ١٢ عند المتقدمين

3. පැහැදිලි කරන්නාවූ මෙම ග්‍රන්ථය මත දිවුරමින්,

اِنَّآ اَنْزَلْنٰهُ فِيْ لَيْلَةٍ مُّبٰرَكَةٍ اِنَّا كُنَّا مُنْذِرِيْنَ ④

4. නියතවශයෙන්ම අපි මෙය ආශිර්වාද ලත් රාත්‍රියක පහළ කළෙමු. නියතවශයෙන්ම අපි (නපුරට එරෙහිව) අවවාද කරමින් සිටින්නෙමු.

فِيْهَا يُفْرَقُ كُلُّ اَمْرٍ حَكِيْمٍ ۙ ⑤

5. මෙහි සියළු ඥාණාන්විත කටයුතු තිරණය කරන ලදී.

اَمْرًا مِّنْ عِنْدِنَا ؕ اِنَّا كُنَّا مُرْسِلِيْنَ ۚ ⑥

6. (මෙය) අපගෙන් වන විධානයක් ලෙසය. සැබැවින්ම අපි නිරතුරුවම (දූතයින්) එවමින් සිටින්නෙමු.

رَحْمَةً مِّنْ رَّبِّكَ ؕ اِنَّهٗ هُوَ السَّمِيْعُ الْعَلِيْمُ ۙ ⑦

7. ඔබගේ අධිපතියාණන්ගෙන් වන දයාවක් ලෙසය. සැබැවින්ම ඔහු සියල්ල අසන්නාය, සියල්ල දත්තාය.

وقف لازم

رَبِّ السَّمٰوٰتِ وَالْاَرْضِ وَمَا بَيْنَهُمَا ۘ اِنْ كُنْتُمْ مُّوْقِنِيْنَ ⑧

8. අහස්හිද පොළොවෙහිද ඒ දෙක අතර ඇති සියළු දෙයෙහිද අධිපතියාණන්ය. නුඹලා දැඩිව විශ්වාස කරන්නන් (පමණක්) වන්නේ නම්,

لَآ اِلٰهَ اِلَّا هُوَ يُحْيٖ وَيُمِيْتُ ؕ رَبُّكُمْ وَرَبُّ اٰبَآئِكُمُ الْاَوَّلِيْنَ ⑨

9. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙකු නැත. ඔහු ජීවය දෙන්නේය. තවද ඔහු මරණයට පත්කරන්නේය. (ඔහු) නුඹලාගේ අධිපතියාණන් මෙන්ම නුඹලාගේ මුතුන් මිත්තන්ගේද අධිපතියාණන්ය.

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

بَلْ هُمْ فِىْ شَكٍّ يَّلْعَبُوْنَ ⑩

10. එහෙත් ඔවුහු සැකයෙහි (ගිලිහී) සෙල්ලම් කරති.

فَارْتَقِبْ يَوْمَ تَاْتِى السَّمَآءُ بِدُخَانٍ مُّبِيْنٍ ⑪

11. එහෙයින්, අහස පැහැදිලි දුමාරයක් රැගෙන එන්නාවූ දිනය ඔබ බලාපොරොත්තුවෙන් සිටින්න.

يَّغْشَى النَّاسَ ؕ هٰذَا عَذَابٌ اَلِيْمٌ ⑫

12. එය මිනිසුන්ව වෙළා ගන්නේය. මෙය වේදනීය දඬුවමක් වනු ඇත.

رَبَّنَا اكْشِفْ عَنَّا الْعَذَابَ اِنَّا مُؤْمِنُوْنَ ⑬

13. (එවිට ජනතාව), 'අපගේ අධිපතියාණෙනි! අපගෙන් එම දඬුවම ඉවත් කරනු මැනව. ඇත්තෙන්ම අපි විශ්වාසිතයින් වන්නෙමු'(යි හඬ නගන්නෝය).

اَنّٰى لَهُمُ الذِّكْرٰى وَ قَدْ جَآءَهُمْ رَسُوْلٌ مُّبِيْنٌ ⑭

14. කරුණු පැහැදිලිව විස්තර කරන්නාවූ දූතයෙක් ඔවුන් වෙත පෙරාතුවම පැමිණ තිබියදී ඔවුන්ට (තවත්) අනුශාසනාවක් කොහෙන් ලැබේවිද?

ثُمَّ تَوَلَّوْا عَنْهُ وَقَالُوْا مُعَلَّمٌ مَّجْنُوْنٌ ⑮

15. එනමුත්, ඔවුන් ඔහුගෙන් ඉවත්ව ගියහ. තවද, 'ඔහු උගන්වනු ලැබූ පිස්සෙක්යැ'යි කීහ.

اِنَّا كَاشِفُوا الْعَذَابِ قَلِيْلًا اِنَّكُمْ عَآئِدُوْنَ ⑯

16. ඇත්තෙන්ම, අපි එම දඬුවම ටික කලකට ඉවත් කරන්නෙමු. (නමුත්) නුඹලා නිශ්චිතවම (අවිශ්වාසය වෙතට) පෙරලා යන්නන්ය.

يَوْمَ نَبْطِشُ الْبَطْشَةَ الْكُبْرٰى ۚ اِنَّا مُنْتَقِمُوْنَ ⑰

17. එදින අපි (නුඹලාව) දැඩි ග්‍රහණයකින් හසු කරනවිට නිශ්චිතවම අපි නියමාකාරව පළිගන්නන් වෙමු.

وَلَقَدْ فَتَنَّا قَبْلَهُمْ قَوْمَ فِرْعَوْنَ وَجَآءَهُمْ رَسُوْلٌ كَرِيْمٌ ⑱

18. තවද ඔවුන්ට පෙර අපි නියතවශයෙන්ම ෆිර්අවුන්ගේ ජනතාව පිරික්සුවෙමු. තවද ඔවුන් වෙතට ගෞරවනීය දූතයෙක් පැමිණියේය.

اَنْ اَدُّوْٓا اِلَىَّ عِبَادَ اللّٰهِ ؕ اِنِّىْ لَكُمْ رَسُوْلٌ اَمِيْنٌ ⑲

19. (ඔහු මෙසේ පැවසුවේය) 'අල්ලාහ්ගේ දාසයින්ව මා වෙතට බාරදෙන්න. ඇත්තෙන්ම මම නුඹලාහට විශ්වාසනීය දූතයෙක් වෙමි'

20. 'තවද නුඹලා අල්ලාහ්ට එරෙහිව කැරලි නොගසනු. නියතවශයෙන්ම මම නුඹලා වෙතට පැහැදිලි සාධකයක් සමග පැමිණ ඇත්තෙමි'.

وَأَن لَّا تَعْلُوا عَلَى اللَّهِ ۖ إِنِّي آتِيكُم بِسُلْطَانٍ مُّبِينٍ ﴿٢٠﴾

21. 'නුඹලා මා ගල් ගසා මරා නොදමනු පිණිස, මම මාගේ අධිපතියාණන්ගෙන් මෙන්ම නුඹලාගේ අධිපතියාණන්ගෙන්ද සරණ පතමි'.

وَإِنِّي عُذْتُ بِرَبِّي وَرَبِّكُمْ أَن تَرْجُمُونِ ﴿٢١﴾

22. 'තවද නුඹලා මාව විශ්වාස නොකරන්නේ නම්, නුඹලා මාව තනිව හැර දමනු'.

وَإِن لَّمْ تُؤْمِنُوا لِي فَاعْتَزِلُونِ ﴿٢٢﴾

23. පසුව ඔහු තම අධිපතියාණන් වෙත, 'මොවුහු ඇත්තෙන්ම පාපකාරී ජනතාවක් වෙති'යි (පවසමින්) අයැදිය.

فَدَعَا رَبَّهُ أَنَّ هَٰؤُلَاءِ قَوْمٌ مُّجْرِمُونَ ﴿٢٣﴾

24. (එයට දෙවියන්) 'රාත්‍රියේදී මාගේ දාසයින්ව ඉවත් කරගෙන යන්න. මන්ද ඇත්තෙන්ම නුඹලාලුහු බඳිනු ලබන්නෙහුමයැ'(යි පැවසුවේය).

فَأَسْرِ بِعِبَادِي لَيْلًا إِنَّكُم مُّتَّبَعُونَ ﴿٢٤﴾

25. 'එමෙන්ම මුහුද නිශ්චලව (පවතින වේලාවකදී) ඔබ එය පසු කර යන්න. නියතවශයෙන්ම (විනාශයට නියමවූ) ඔවුන් ගිල්වනු ලබන සේනාවකි'.

وَاتْرُكِ الْبَحْرَ رَهْوًا ۖ إِنَّهُمْ جُندٌ مُّغْرَقُونَ ﴿٢٥﴾

26. කෙතරම් දිය උල්පත් සහ උද්‍යානයන් ඔවුන් පිටුපසින් හැර ගියේද!

كَمْ تَرَكُوا مِن جَنَّاتٍ وَعُيُونٍ ﴿٢٦﴾

27. එමෙන්ම ධාන්‍ය කෙත්ද ගෞරවාන්විත ස්ථානයන්ද!

وَزُرُوعٍ وَمَقَامٍ كَرِيمٍ ﴿٢٧﴾

28. එමෙන්ම ඔවුන් අතිශයින්ම සතුටුවූ සැප සම්පත්ද!

وَنَعْمَةٍ كَانُوا فِيهَا فَاكِهِينَ ﴿٢٨﴾

29. එය එසේ (වීමට තීන්දු වී තිබුණේ)ය. තවද අපි මේ දේවල් තවත් ජනතාවකට උරුම කළෙමු.

كَذَٰلِكَ ۖ وَأَوْرَثْنَاهَا قَوْمًا آخَرِينَ ﴿٢٩﴾

30. එමෙන්ම අහසද පොළොවද ඔවුන් වෙනුවෙන් වැළපුණේ නැත.

فَمَا بَكَتْ عَلَيْهِمُ السَّمَاءُ وَالْأَرْضُ

وَمَا كَانُوا مُنظَرِينَ ﴿٣٠﴾

තවද ඔවුන් කාල අවකාශ නොදෙනු ලැබූහ.

وَلَقَدْ نَجَّيْنَا بَنِي إِسْرَاءِيلَ مِنَ الْعَذَابِ الْمُهِينِ ﴿٣١﴾

31. තවද අපි ඉස්රාඊලයේ දරුවන්ව නින්දිත දඬුවමෙන් මුදවා ගත්තෙමු.

مِن فِرْعَوْنَ ۚ إِنَّهُ كَانَ عَالِيًا مِّنَ الْمُسْرِفِينَ ﴿٣٢﴾

32. ෆිර්අවුන්ගෙන් (පීඩා ඇතිවි)ය. නියතවශයෙන්ම ඔහු සීමාව ඉක්මවන්නන් අතුරින් උද්ධච්ඡ විය.

وَلَقَدِ اخْتَرْنَاهُمْ عَلَىٰ عِلْمٍ عَلَى الْعَالَمِينَ ﴿٣٣﴾

33. තවද අපි දැනුවත්වම ඔවුන්ව (ඔවුන්ගේ යුගයේ) ලෝවැසියන්ට ඉහළින් තෝරාගත්තෙමු.

وَآتَيْنَاهُم مِّنَ الْآيَاتِ مَا فِيهِ بَلَاءٌ مُّبِينٌ ﴿٣٤﴾

34. තවද අපි ඔවුනට ඇතැම් සළකුණු දුනිමු. එහි පැහැදිලි පිරික්සුමක් විය.

إِنَّ هَٰؤُلَاءِ لَيَقُولُونَ ﴿٣٥﴾

35. නියතවශයෙන්ම (මක්කා වැසියන් වන) මොවුහු (මෙසේ) පවසති.

إِنْ هِيَ إِلَّا مَوْتَتُنَا الْأُولَىٰ وَمَا نَحْنُ بِمُنشَرِينَ ﴿٣٦﴾

36. 'අපගේ මෙම ප්‍රථම මරණය හැර වෙන (මරණයක්) නැත, (මින් මතු ජීවිතයක්ද නොමැත.) තවද අපි නැවත නැගිටුවනු නොලබන්නන් වෙමු'.

فَأْتُوا بِآبَائِنَا إِن كُنتُمْ صَادِقِينَ ﴿٣٧﴾

37. 'එබැවින් අපගේ පියවරුන්ව (ආපසු) ගෙන එනු. නුඹලා සත්‍යය පවසන්නේ නම්'.

أَهُمْ خَيْرٌ أَمْ قَوْمُ تُبَّعٍ وَالَّذِينَ مِن قَبْلِهِمْ ۚ أَهْلَكْنَاهُمْ ۖ إِنَّهُمْ كَانُوا مُجْرِمِينَ ﴿٣٨﴾

38. ඔවුන් විශිෂ්ඨද නැතහොත් "තුබ්බා"ගේ ජනතාව සහ ඔවුන්ට පෙර සිටි අයද? අපි ඔවුන්ව විනාශ කළෙමු. නියතවශයෙන්ම ඔවුන් පාපකාරීන් වූහ.

وَمَا خَلَقْنَا السَّمَاوَاتِ وَالْأَرْضَ وَمَا بَيْنَهُمَا لَاعِبِينَ ﴿٣٩﴾

39. එමෙන්ම අහස්ද පොළොවද ඒ දෙක අතර ඇති සියල්ලවද අපි කෙළි සෙල්ලමක් ලෙස නොමැව්වෙමු.

مَا خَلَقْنٰهُمَآ اِلَّا بِالْحَقِّ وَلٰكِنَّ اَكْثَرَهُمْ لَا يَعْلَمُوْنَ ۝٤٠

40. අපි ඒවා සැබෑ හේතුවකින් යුතුව මිස නොමැව්වෙමු. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය තේරුම් නොගනිති.

اِنَّ يَوْمَ الْفَصْلِ مِيْقَاتُهُمْ اَجْمَعِيْنَ ۙ۝٤١

41. සැබැවින්ම තීන්දුවේ දිනය ඔවුන් සියල්ලන්ටම නියමිත වූ කාලය වේ.

يَوْمَ لَا يُغْنِيْ مَوْلًى عَنْ مَّوْلًى شَيْـًٔا وَّلَا هُمْ يُنْصَرُوْنَ ۙ۝٤٢

42. එදින මිතුරෙක් තවත් මිතුරෙකුට කිසිසේත් ප්‍රයෝජනයක් නොවනු ඇත. තවද ඔවුන් උදව් නොකරනු ලබන්නෝය.

اِلَّا مَنْ رَّحِمَ اللّٰهُ ۗ اِنَّهٗ هُوَ الْعَزِيْزُ الرَّحِيْمُ ۝٤٣

43. අල්ලාහ් දයාව දැක්වූ අය හැරය. නියතවශයෙන්ම ඔහු බලසම්පන්නය, පරම දයාබරය.

اِنَّ شَجَرَتَ الزَّقُّوْمِ ۙ۝٤٤

44. සැබැවින්ම zසක්කුම් ගස.

طَعَامُ الْاَثِيْمِ ۛ۝٤٥

45. එය පාපිෂ්ඨයාගේ ආහාරය වනු ඇත.

كَالْمُهْلِ ۛ يَغْلِيْ فِي الْبُطُوْنِ ۙ۝٤٦

46. උණු වූ තඹ වැනිය. එය (ඔවුන්ගේ) කුස් තුල උණු වන්නේය.

كَغَلْيِ الْحَمِيْمِ ۝٤٧

47. ලෝදිය උතුරන්නා සේය.

خُذُوْهُ فَاعْتِلُوْهُ اِلٰى سَوَآءِ الْجَحِيْمِ ۖ۝٤٨

48. 'ඔහුව හසුකරගෙන දැවෙන ගින්නේ මැදට ඇද දමනු'.

ثُمَّ صُبُّوْا فَوْقَ رَاْسِهٖ مِنْ عَذَابِ الْحَمِيْمِ ۗ۝٤٩

49. 'පසුව ඔහුගේ හිස මතට දඬුවමක් ලෙස ලෝදිය වත් කරනු'.

ذُقْ ۚ اِنَّكَ اَنْتَ الْعَزِيْزُ الْكَرِيْمُ ۝٥٠

50. '(එය) අත් විඳිනු! නියතවශයෙන්ම නුඹ, නුඹව බලසම්පන්න මෙන්ම ගෞරවනීය යැයි (සිතුවෙහිය)'.

اِنَّ هٰذَا مَا كُنْتُمْ بِهٖ تَمْتَرُوْنَ ۝٥١

51. 'ඇත්තෙන්ම නුඹලා සැක කළ දෙය මෙය වේ'.

| | |
|---|---|
| 52. නිශ්චිතවම බියබැතිමතුන් සුරක්ෂිත ස්ථානයෙහි සිටිති. | اِنَّ الۡمُتَّقِيۡنَ فِىۡ مَقَامٍ اَمِيۡنٍۙ ۝٥٢ |
| 53. උද්‍යානයන් සහ දිය උල්පත් අතරය. | فِىۡ جَنّٰتٍ وَّعُيُوۡنٍۚ ۝٥٣ |
| 54. ගෙත්තම් කළ සියුම් සේද සහ රළු සේද වලින්ද පැළඳ එකිනෙකාට මුහුණලා සිටින්නෝය. | يَّلۡبَسُوۡنَ مِنۡ سُنۡدُسٍ وَّاِسۡتَبۡرَقٍ مُّتَقٰبِلِيۡنَۚ ۝٥٤ |
| 55. (එය) එලෙස (වන්නේ)ය. තවද විස්මිත නෙත් වලින් යුත් අප්සරාවන් අපි ඔවුන්ට ඇසුරු කිරීමට සලස්වන්නෙමු. | كَذٰلِكَ وَزَوَّجۡنٰهُمۡ بِحُوۡرٍ عِيۡنٍؕ ۝٥٥ |
| 56. එහිදී ඔවුන් (සාමයෙන් සහ) සුරක්ෂිතව (සියළු වර්ගයේ) පළතුරු ගෙන්වා ගන්නෝය. | يَدۡعُوۡنَ فِيۡهَا بِكُلِّ فَاكِهَةٍ اٰمِنِيۡنَۙ ۝٥٦ |
| 57. ඔවුන් පළමු මරණය හැර එහිදී තවත් මරණයක් නොවිඳින්නෝය. තවද දැවෙන ගින්නෙහි දඬුවමින් ඔහු ඔවුන්ව මුදවා ගන්නේය. | لَا يَذُوۡقُوۡنَ فِيۡهَا الۡمَوۡتَ اِلَّا الۡمَوۡتَةَ الۡاُوۡلٰىۚ وَوَقٰهُمۡ عَذَابَ الۡجَحِيۡمِۙ ۝٥٧ |
| 58. ඔබගේ අධිපතියාණන්ගෙන් වන කරුණාවක් ලෙසය. එය අති මහත් ජයග්‍රහණය වේ. | فَضۡلًا مِّنۡ رَّبِّكَؕ ذٰلِكَ هُوَ الۡفَوۡزُ الۡعَظِيۡمُ ۝٥٨ |
| 59. තවද ඔවුන් අවධානයට ගනු පිණිස ඔබගේ බසින් අපි මෙය (කුර්ආනය) පහසු කර ඇත්තෙමු. | فَاِنَّمَا يَسَّرۡنٰهُ بِلِسَانِكَ لَعَلَّهُمۡ يَتَذَكَّرُوۡنَ ۝٥٩ |
| 60. එබැවින් ඔබ බලා සිටින්න. ඔවුන්ද බලා සිටිති. | فَارۡتَقِبۡ اِنَّهُمۡ مُّرۡتَقِبُوۡنَ ۝٦٠ |



අල්-ජාසියහ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. **මහා කාරුණික** වූද **පරම දයාබර** වූද අල්ලාහ්ගේ නාමයෙන්.

حٰمٓ ۝٢

2. හා, මීම්.◆

تَنۡزِيۡلُ الۡكِتٰبِ مِنَ اللّٰهِ الۡعَزِيۡزِ الۡحَكِيۡمِ ۝٣

3. මෙම ග්‍රන්ථය පහළ කරනු ලැබීම බලසම්පන්න වූද ප්‍රඥාසම්පන්න වූද අල්ලාහ්ගෙන්ය.

اِنَّ فِى السَّمٰوٰتِ وَالۡاَرۡضِ لَاٰيٰتٍ لِّلۡمُؤۡمِنِيۡنَ ۝٤

4. සැබැවින්ම විශ්වාසිතයින්හට අහස් මෙන්ම පොළොවෙහි සළකුණු ඇත.

وَفِىۡ خَلۡقِكُمۡ وَمَا يَبُثُّ مِنۡ دَآبَّةٍ اٰيٰتٌ لِّقَوۡمٍ يُّوۡقِنُوۡنَ ۝٥

5. තවද නුඹලාගේ මැවීමෙහිද ඔහු (පොළොවෙහි) විසුරුවා ඇති සියළු ජීවීන් අතුරින්ද දෑඩි විශ්වාසය හිමි ජනතාවට සළකුණු ඇත.

وَاخۡتِلَافِ الَّيۡلِ وَالنَّهَارِ وَمَاۤ اَنۡزَلَ اللّٰهُ مِنَ السَّمَآءِ مِنۡ رِّزۡقٍ فَاَحۡيَا بِهِ الۡاَرۡضَ بَعۡدَ مَوۡتِهَا وَتَصۡرِيۡفِ الرِّيٰحِ اٰيٰتٌ لِّقَوۡمٍ يَّعۡقِلُوۡنَ ۝٦

6. තවද රාත්‍රිය සහ දහවල මාරුවීමෙහිද අල්ලාහ් අහසින් පහළ කරන ජීවනෝපායෙහිද එමගින් ඔහු පොළොවට එය අප්‍රාණික වූවායින් පසු ප්‍රාණවත් කිරීමෙහිද තවද සුළඟ වෙනස්කරවීමෙහිද තේරුම් ගැනීමට (උත්සාහ කරන) ජනතාවට සළකුණු ඇත.

تِلۡكَ اٰيٰتُ اللّٰهِ نَتۡلُوۡهَا عَلَيۡكَ بِالۡحَقِّ ۚ فَبِاَىِّ حَدِيۡثٍۢ بَعۡدَ اللّٰهِ وَاٰيٰتِهٖ يُؤۡمِنُوۡنَ ۝٧

7. මේවා අල්ලාහ්ගේ වදන්ය. අපි ඒවා සත්‍යයෙන් යුතුව ඔබට පාරායනා කර පෙන්වන්නෙමු. එසේ නම් අල්ලාහ් සහ ඔහුගේ වදන් (ප්‍රතික්ෂේප කළ) පසු ඔවුන් කුමන විෂයයන් කෙරෙහි විශ්වාස කරන්නෙහුද?

وَيۡلٌ لِّكُلِّ اَفَّاكٍ اَثِيۡمٍ ۝٨

8. සියළු මුසාවාදී පාපකාරියෙකුටම විපතකි.

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

9. ඔහු තමා කෙරෙහි පාරායනා කරනු ලබන අල්ලාහ්ගේ වදන්වලට සවන්දුන් පසු ඒවා නැසුනාක් මෙන් (ඔහුගේම අවිශ්වාසයෙහි) ඇලී සිටින්නේය. එබැවින් වේදනීය දඬුවමක ආරංචිය ඔහුට දෙන්න.

يَّسْمَعُ اٰيٰتِ اللّٰهِ تُتْلٰى عَلَيْهِ ثُمَّ يُصِرُّ
مُسْتَكْبِرًا كَاَنْ لَّمْ يَسْمَعْهَا ۚ فَبَشِّرْهُ
بِعَذَابٍ اَلِيْمٍ ﴿٩﴾

10. තවද අපගේ වදන්වලින් ඇතැම් දේ ඔහු දැනගත් කල්හි ඔහු ඒවා විහිළුවට ගන්නේය. එවැන්නන්හට නින්දිත දඬුවමක් ඇත.

وَاِذَا عَلِمَ مِنْ اٰيٰتِنَا شَيْـًٔا ۨاتَّخَذَهَا هُزُوًا ؕ
اُولٰٓئِكَ لَهُمْ عَذَابٌ مُّهِيْنٌ ؕ ﴿١٠﴾

11. ඔවුන් ඉදිරියෙහි ඇත්තේ නිරය වේ. තවද ඔවුන් ඉපැයූ දේ මෙන්ම ඔවුන් අල්ලාහ් හැර කවුරුන්ව ආරක්ෂකයින් ලෙස ගත්තේද ඒ අයද ඔවුන්ට අල්පයක්වත් ඵලක් ගෙන නොදෙනු ඇත. තවද ඔවුන්ට අති මහත් වූ දඬුවමක් ලැබෙනු ඇත.

مِنْ وَّرَآئِهِمْ جَهَنَّمُ ۚ وَلَا يُغْنِيْ عَنْهُمْ مَّا
كَسَبُوْا شَيْـًٔا وَّلَا مَا اتَّخَذُوْا مِنْ دُوْنِ اللّٰهِ
اَوْلِيَآءَ ۚ وَلَهُمْ عَذَابٌ عَظِيْمٌ ؕ ﴿١١﴾

12. මෙය යහමග වේ. තවද තම අධිපතියාණන්ගේ සළකුණු කෙරෙහි අවිශ්වාස කරන අය ගත්කල ඔවුනට වධ විඳීමේ වේදනීය දඬුවමක් ඇත.

هٰذَا هُدًى ۚ وَالَّذِيْنَ كَفَرُوْا بِاٰيٰتِ رَبِّهِمْ
لَهُمْ عَذَابٌ مِّنْ رِّجْزٍ اَلِيْمٌ ﴿١٢﴾

13. ඔහුගේ විධානයෙන් නුඹලාට නැව් යාත්‍රා කරනු පිණිසද නුඹලා ඔහුගේ වරප්‍රසාදයන් සොයනු පිණිසද නුඹලා කෘතඥ වනු පිණිස නුඹලාට මුහුද සේවය සඳහා යෙදෙව්වේ අල්ලාහ්මය.

اَللّٰهُ الَّذِيْ سَخَّرَ لَكُمُ الْبَحْرَ لِتَجْرِيَ
الْفُلْكُ فِيْهِ بِاَمْرِهٖ وَلِتَبْتَغُوْا مِنْ فَضْلِهٖ
وَلَعَلَّكُمْ تَشْكُرُوْنَ ۚ ﴿١٣﴾

14. තවද ඔහු අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද නුඹලාට සේවය සඳහා යෙදෙව්වේය. (මේ) සියල්ල ඔහුගෙන්ය. මෙනෙහි කරන ජනතාවකට නියතවශයෙන්ම එහි සළකුණු ඇත.

وَسَخَّرَ لَكُمْ مَّا فِي السَّمٰوٰتِ وَمَا فِي
الْاَرْضِ جَمِيْعًا مِّنْهُ ؕ اِنَّ فِيْ ذٰلِكَ لَاٰيٰتٍ
لِّقَوْمٍ يَّتَفَكَّرُوْنَ ﴿١٤﴾

15. අල්ලාහ්ගේ පොරොන්දු වූ දිනයන් (පැමිණෙනු ඇත)යැයි

قُلْ لِّلَّذِيْنَ اٰمَنُوْا يَغْفِرُوْا لِلَّذِيْنَ

لَا يَرْجُوْنَ اَيَّامَ اللّٰهِ لِيَجْزِىَ قَوْمًا بِمَا كَانُوْا يَكْسِبُوْنَ ﴿١٥﴾

අපේක්ෂා නොකරන අය කෙරෙහි සමාව දෙන ලෙස විශ්වාස කළ අයහට පවසන්න. එය ජනතාවට, ඔවුන් ඉපැයූ දේ හේතුවෙන් ඔහු ඵලවිපාක දෙනු පිණිසය.

مَنْ عَمِلَ صَالِحًا فَلِنَفْسِهٖ ۚ وَمَنْ اَسَآءَ فَعَلَيْهَا ۖ ثُمَّ اِلٰى رَبِّكُمْ تُرْجَعُوْنَ ﴿١٦﴾

16. කවරෙකු හෝ යහපත් දෙයක් කරන්නේද එය ඔහුගේ ආත්මය වෙනුවෙන්ය. තවද කවරෙකු හෝ නපුරක් කරන්නේද එය තමන්ට එරෙහිවමය. පසුව නුඹලාගේ අධිපතියාණන් වෙතට නුඹලා (සියල්ලන්ම) ආපසු ගෙන එනු ලබන්නෙහුය.

وَلَقَدْ اٰتَيْنَا بَنِىْۤ اِسْرَآءِيْلَ الْكِتٰبَ وَالْحُكْمَ وَالنُّبُوَّةَ وَرَزَقْنٰهُمْ مِّنَ الطَّيِّبٰتِ وَفَضَّلْنٰهُمْ عَلَى الْعٰلَمِيْنَ ۚ﴿١٧﴾

17. තවද ඇත්තෙන්ම අපි ඉස්රාඊලයේ දරුවන්ට පුස්තකයද අධිරාජ්‍යයද වක්තෘත්ත්වය දුන්නෙමු. තවද අපි ඔවුනට (යහපත් මෙන්ම) පවිත්‍ර වූ දේවල් සපයා දුන්නෙමු. තවද අපි ඔවුන්ව (එකල) සියළු ජනතාවන්ට වඩා උසස් කළෙමු.

وَاٰتَيْنٰهُمْ بَيِّنٰتٍ مِّنَ الْاَمْرِ ۚ فَمَا اخْتَلَفُوْۤا اِلَّا مِنْۢ بَعْدِ مَا جَآءَهُمُ الْعِلْمُ ۙ بَغْيًۢا بَيْنَهُمْ ؕ اِنَّ رَبَّكَ يَقْضِىْ بَيْنَهُمْ يَوْمَ الْقِيٰمَةِ فِيْمَا كَانُوْا فِيْهِ يَخْتَلِفُوْنَ ﴿١٨﴾

18. තවද අපි ඔවුනට නීතිය පිළිබඳව පැහැදිලි උපදේශයන් දුන්නෙමු. තවද ඔවුන් වෙතට (සත්‍ය) දැනුම පැමිණි පසු ඔවුන් එකිනෙකා අතර වූ පරස්පර විරෝධය හේතුවෙන් මිස ඔවුහු භේද නොවූහ. සැබැවින්ම ඔබගේ අධිපතියාණන් ඔවුන් භේද වූ දේ පිළිබඳව පුනරුත්ථාන දිනයේදී ඔවුනතර විනිශ්චය කරන්නේය.

ثُمَّ جَعَلْنٰكَ عَلٰى شَرِيْعَةٍ مِّنَ الْاَمْرِ فَاتَّبِعْهَا وَلَا تَتَّبِعْ اَهْوَآءَ الَّذِيْنَ لَا يَعْلَمُوْنَ ﴿١٩﴾

19. පසුව අපි ඔබව දේව නීතිය ඇතුලත් පැහැදිලි මාර්ගයෙහි නියම කළෙමු. එබැවින් එය අනුගමනය කරන්න. තවද නොදන්නා අයගේ නරක අභිලාෂයන් අනුගමනය නොකරන්න.

اِنَّهُمْ لَنْ يُّغْنُوْا عَنْكَ مِنَ اللّٰهِ شَيْـًٔا ؕ وَاِنَّ الظّٰلِمِيْنَ بَعْضُهُمْ اَوْلِيَآءُ بَعْضٍ ۚ وَاللّٰهُ

20. සැබැවින්ම අල්ලාහ්ට එරෙහිව ඔවුන් ඔබට අල්පයක්වත් ප්‍රයෝජනවත් නොවන්නෝය. එමෙන්ම නියතවශයෙන්ම වැරදි කරන්නන්

وَلِيُّ الْمُتَّقِيْنَ ⑳

ගත්කල ඔවුන්ගෙන් සමහරු සමහරුන්ගේ මිත්‍රයෝය. නමුත් අල්ලාහ් බියබැතිමතුන්ගේ මිත්‍රයාය.

هٰذَا بَصَآئِرُ لِلنَّاسِ وَهُدًى وَّرَحْمَةٌ لِّقَوْمٍ يُّوْقِنُوْنَ ㉑

21. මෙ(ම ග්‍රන්ථ)ය මනුෂ්‍ය වර්ගයාට පැහැදිලි සාධක වේ. තවද දැඩි විශ්වාසය හිමි ජනතාවට මෙය මග පෙන්වීමක්ද දයාවක්ද වේ.

اَمْ حَسِبَ الَّذِيْنَ اجْتَرَحُوا السَّيِّاٰتِ اَنْ نَّجْعَلَهُمْ كَالَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ ۙ سَوَآءً مَّحْيَاهُمْ وَمَمَاتُهُمْ ؕ سَآءَ مَا يَحْكُمُوْنَ ㉒

22. විවිධ නරක ක්‍රියාවන්හි නියැලුන අය ගත්කල අපි ඔවුන්ව විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අය මෙන් පත්කරන්නෙමුයි ඔවුන් සිතන්නෝද? (එසේනම්) ඔවුන්ගේ ජීවිතය සහ ඔවුන්ගේ මරණය එක සමාන වන්නේද? ඔවුන් තීන්දු කරන දේ (ඇත්තෙන්ම) නපුරුය.

وَخَلَقَ اللّٰهُ السَّمٰوٰتِ وَالْاَرْضَ بِالْحَقِّ وَلِتُجْزٰى كُلُّ نَفْسٍ بِمَا كَسَبَتْ وَهُمْ لَا يُظْلَمُوْنَ ㉓

23. තවද අල්ලාහ් අහස්ද පොළොවද සත්‍යය සමගින් මවා ඇත්තේය. තවද එහි ප්‍රතිඵලයක් වශයෙන් සියළු ආත්මයන් එය ඉපැයූ දේට ඵල විපාක ලබන්නේය. තවද ඔවුන්ට අසාධාරණ නොකරනු ලබන්නේය.

اَفَرَءَيْتَ مَنِ اتَّخَذَ اِلٰهَهٗ هَوٰىهُ وَاَضَلَّهُ اللّٰهُ عَلٰى عِلْمٍ وَّخَتَمَ عَلٰى سَمْعِهٖ وَقَلْبِهٖ وَجَعَلَ عَلٰى بَصَرِهٖ غِشٰوَةً ؕ فَمَنْ يَّهْدِيْهِ مِنْۢ بَعْدِ اللّٰهِ ؕ اَفَلَا تَذَكَّرُوْنَ ㉔

24. තම නපුරු සිතැඟියාව තම දෙවියන් කර ගත් ඔහුව ඔබ දැක තිබේද? තවද අල්ලාහ් (තම) ඥානය අනුව ඔහු නොමග ගිය බවට තීරණය කර ඔහුගේ කන් හිද ඔහුගේ හදවතෙහිද ඔහු මුද්‍රා තබා තවද ඔහුගේ ඇස් මත ඔහු තිරයක් යොදා ඇත. අල්ලාහ් (ඔහු වරද කළ බවට තීන්දු කළා)ට පසු ඔහුට මග පෙන්වන්නේ කවුරුන්ද? එසේ නම් නුඹලා මෙනෙහි නොකරන්නෙහුද?

وَقَالُوْا مَا هِيَ اِلَّا حَيَاتُنَا الدُّنْيَا نَمُوْتُ وَنَحْيَا وَمَا يُهْلِكُنَآ اِلَّا الدَّهْرُ ۚ وَمَا لَهُمْ بِذٰلِكَ مِنْ عِلْمٍ ۚ اِنْ هُمْ اِلَّا

25. තවද ඔවුහු, 'අපගේ මෙලොව ජීවිතය හැර අන් දෙයක් නොමැත. අපි මරණයටද පත්වන්නෙමු. ජීවත්වද සිටින්නෙමු. තවද කාලය මිස අන් කිසිවක් අපව විනාශ නොකරන්නේ'යැයි කියන්නෝය. නමුත් ඔවුනට ඒ ගැන කිසිදු දැනුමක්

يَظُنُّونَ ﴿٢٥﴾

නොමැත. ඔවුන් අනුමාන කරනවා මිස අන්කිසිවක් නැත.

وَإِذَا تُتْلَىٰ عَلَيْهِمْ آيَاتُنَا بَيِّنَاتٍ مَّا كَانَ حُجَّتَهُمْ إِلَّا أَن قَالُوا ائْتُوا بِآبَائِنَا إِن كُنتُمْ صَادِقِينَ ﴿٢٦﴾

26. තවද අපගේ පැහැදිලි වදන් ඔවුන්ට පාරායනා කරනු ලැබූ කල්හි ඔවුන්ගේ එකම විවාදය වනුයේ 'නුඹලා සත්‍යවාදීන් නම් අපගේ පියවරුන් (ආපසු) ගෙන එනු' යන්න වේ.

قُلِ اللَّهُ يُحْيِيكُمْ ثُمَّ يُمِيتُكُمْ ثُمَّ يَجْمَعُكُمْ إِلَىٰ يَوْمِ الْقِيَامَةِ لَا رَيْبَ فِيهِ وَلَٰكِنَّ أَكْثَرَ النَّاسِ لَا يَعْلَمُونَ ﴿٢٧﴾

27. පවසන්න. 'නුඹලාට ජීවය දෙන්නේද පසුව නුඹලාව මරණයට පත් කරන්නේද අල්ලාහ්මය. පසුව ඔහු නුඹලාව පුනරුත්ථාන දිනයේදී එක්රැස් කරන්නේය. ඒ ගැන කිසිදු සැකයක් නැත. නමුත් මිනිසුන්ගෙන් බොහෝ අය නොදන්නෝය'.

وَلِلَّهِ مُلْكُ السَّمَاوَاتِ وَالْأَرْضِ ۚ وَيَوْمَ تَقُومُ السَّاعَةُ يَوْمَئِذٍ يَخْسَرُ الْمُبْطِلُونَ ﴿٢٨﴾

28. අහස් සහ පොළොවේ රාජධානිය අල්ලාහ්ට අයත්ය. තවද එදින එම හෝරාව පැමිණෙන විටදී සත්‍යය ප්‍රතික්ෂේප කරන අය එදිනෙහිදී දුක් විඳින්නෝය.

وَتَرَىٰ كُلَّ أُمَّةٍ جَاثِيَةً ۚ كُلُّ أُمَّةٍ تُدْعَىٰ إِلَىٰ كِتَابِهَا الْيَوْمَ تُجْزَوْنَ مَا كُنتُمْ تَعْمَلُونَ ﴿٢٩﴾

29. තවද සෑම ජන සමූහයක්ම දණ ගසනු ලබනු ඔබ දකිනු ඇත. සෑම ජන සමූහයක්ම ඔවුන්ගේ වාර්තාව වෙත කැඳවනු ලබන්නෝය. (තවද) 'නුඹලා කළ දේට මෙදින නුඹලා ප්‍රතිවිපාකය ලබන්නෙහුයැ'යි (ඔවුනට කියනු ලැබේ).

هَٰذَا كِتَابُنَا يَنطِقُ عَلَيْكُم بِالْحَقِّ ۚ إِنَّا كُنَّا نَسْتَنسِخُ مَا كُنتُمْ تَعْمَلُونَ ﴿٣٠﴾

30. 'මෙය අපගේ (ක්‍රියා) වාර්තා පොත වේ. එය නුඹලාට එරෙහිව සත්‍යය පවසයි. නුඹලා කළ (සියළු) දේ (මුළුමනින්ම) සටහන් කර තබන්නට අපි සැලැස්වුවෙමු.'

فَأَمَّا الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ فَيُدْخِلُهُمْ رَبُّهُمْ فِي رَحْمَتِهِ ۚ ذَٰلِكَ هُوَ الْفَوْزُ الْمُبِينُ ﴿٣١﴾

31. එහෙයින් විශ්වාස කොට යහපත් ක්‍රියා කළ අය ගත්කළ ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන්ව ඔහුගේ දයාව තුළට ඇතුළු කරන්නේය. පැහැදිලි ජයග්‍රහණය එය වේ.

32. නමුත් අවිශ්වාස කළ අය ගත් කළ (ඔවුන් වෙත), 'නුඹලාට මාගේ වදන් පාරායනා කරනු නොලැබුවේද? නමුත් නුඹලා උඩඟු වූහ. තවද වරදකාරී ජනතාවක් වූහ'.

وَاَمَّا الَّذِيْنَ كَفَرُوْا ۗ اَفَلَمْ تَكُنْ اٰيٰتِيْ تُتْلٰى عَلَيْكُمْ فَاسْتَكْبَرْتُمْ وَكُنْتُمْ قَوْمًا مُّجْرِمِيْنَ ﴿٣٢﴾

33. "තවද (ඔවුන් වෙත), 'අල්ලාහ්ගේ පොරොන්දුව නිශ්චිතවම සත්‍යයකි. තවද එම හෝරාවද එය ගැන සැකයක් නැතැ'යි කියනු ලැබූ කල්හි නුඹලා, 'එම හෝරාව කුමක් දැයි අපි නොදනිමු. එය හුදෙක් අනුමානයක් මිස අන් කිසිවක් නැත. තවද අපි (ඒ ගැන) ස්ථිරව විශ්වාස කරන්නන්ද නොවෙමු'"යි කීවෙහුය.

وَاِذَا قِيْلَ اِنَّ وَعْدَ اللّٰهِ حَقٌّ وَّالسَّاعَةُ لَا رَيْبَ فِيْهَا قُلْتُمْ مَّا نَدْرِيْ مَا السَّاعَةُ ۙ اِنْ نَّظُنُّ اِلَّا ظَنًّا وَّمَا نَحْنُ بِمُسْتَيْقِنِيْنَ ﴿٣٣﴾

34. තවද ඔවුන් කළ දෙයෙහි නපුරු (ප්‍රතිවිපාකයන්) ඔවුන්ට පෙනෙන අතර ඔවුන් සරදම් කරමින් සිටි දේ ඔවුන්ව වෙලාගනු ඇත.

وَبَدَا لَهُمْ سَيِّاٰتُ مَا عَمِلُوْا وَحَاقَ بِهِمْ مَّا كَانُوْا بِهٖ يَسْتَهْزِءُوْنَ ﴿٣٤﴾

35. තවද (ඔවුනට) 'නුඹලාගේ මෙදින හමුව නුඹලා අමතක කළා සේම මෙදිනෙහි අපිද නුඹලාව අමතක කරන්නෙමු. තවද නුඹලාගේ වාසස්ථානය ගින්න වේ. තවද නුඹලාට උදව්කරුවන්ද නොවනු ඇතැ'(යි කියනු ලබන්නේය).

وَقِيْلَ الْيَوْمَ نَنْسٰىكُمْ كَمَا نَسِيْتُمْ لِقَآءَ يَوْمِكُمْ هٰذَا وَمَاْوٰىكُمُ النَّارُ وَمَا لَكُمْ مِّنْ نّٰصِرِيْنَ ﴿٣٥﴾

36. 'මෙය(ට හේතුව) නුඹලා අල්ලාහ්ගේ සළකුණු විහිළුවට ගත් නිසාත් එමෙන්ම ලෞකික ජීවිතය නුඹලාව මුලාවට පත් කර ඇති නිසාත්ය'. එබැවින් මෙදිනෙහිදී ඔවුන් එයින් පිටතට ගනු නොලබන්නෝය. තවද ඔවුන්ගේ නිදහසට කරුණු දැක්වීමද පිළිගනු නොලබන්නේය.

ذٰلِكُمْ بِاَنَّكُمُ اتَّخَذْتُمْ اٰيٰتِ اللّٰهِ هُزُوًا وَّغَرَّتْكُمُ الْحَيٰوةُ الدُّنْيَا ۚ فَالْيَوْمَ لَا يُخْرَجُوْنَ مِنْهَا وَلَا هُمْ يُسْتَعْتَبُوْنَ ﴿٣٦﴾

37. එබැවින් අහස්හි අධිපතියාණන්ද පොළොවේ අධිපතියාණන්ද (සියළු) ලෝකයන්හි අධිපතියාණන්ද වන අල්ලාහ්ට සියළු ප්‍රශංසා අයත් වන්නේය.

فَلِلّٰهِ الْحَمْدُ رَبِّ السَّمٰوٰتِ وَرَبِّ الْاَرْضِ رَبِّ الْعٰلَمِيْنَ ﴿٣٧﴾

وَلَهُ الْكِبْرِيَآءُ فِي السَّمٰوٰتِ وَالْأَرْضِ ۖ وَهُوَ الْعَزِيزُ الْحَكِيمُ ﴿٣٨﴾

38. තවද අහස් මෙන්ම පොළොවෙහි මහිමය ඔහුටමය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.



අල් අහ්කාෆ්
(මක්කාහිදී පහළ වූවකි)



1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

2. හා, මීම්.◆

حٰمٓ ۝٢

3. මෙම ග්‍රන්ථය පහළ කරනු ලැබීම බලසම්පන්න වූද ප්‍රඥාසම්පන්න වූද අල්ලාහ්ගෙන්ය.

تَنۡزِيۡلُ الۡكِتٰبِ مِنَ اللّٰهِ الۡعَزِيۡزِ الۡحَكِيۡمِ ۝٣

4. අපි අහස් මෙන්ම පොළොවද, ඒ දෙක අතර ඇති සියල්ල සත්‍යය සමගින්ද, නියමිත කාලයකටද මිස නොමැව්වෙමු. නමුත් අවිශ්වාස කළවුන්, ඔවුනට අවවාද කරනු ලැබූ දැයින් ඉවත හැරෙන්නෝය.

مَا خَلَقۡنَا السَّمٰوٰتِ وَالۡاَرۡضَ وَمَا بَيۡنَهُمَاۤ اِلَّا بِالۡحَقِّ وَاَجَلٍ مُّسَمًّى‌ ؕ وَالَّذِيۡنَ كَفَرُوۡا عَمَّاۤ اُنۡذِرُوۡا مُعۡرِضُوۡنَ ۝٤

5. අසන්න, 'නුඹලා අල්ලාහ් හැර කැඳවන දේ දුටුවෙහුද? ඔවුන් පොළොවෙහි මවා ඇති දේ මා හට පෙන්වනු. නැතහොත්, අහස් (නිර්මාණයෙ)හි ඔවුනට කොටසක් තිබේද? නුඹලා සත්‍යය පවසන්නෙහු නම්, මීට පෙර (අනාවරණය වූ) පුස්තකයක් නැත්නම් නුවණ පිළිබඳ මොනයම් හෝ සුළු සළකුණක් ගෙනෙනු'.

قُلۡ اَرَءَيۡتُمۡ مَّا تَدۡعُوۡنَ مِنۡ دُوۡنِ اللّٰهِ اَرُوۡنِىۡ مَاذَا خَلَقُوۡا مِنَ الۡاَرۡضِ اَمۡ لَهُمۡ شِرۡكٌ فِى السَّمٰوٰتِ‌ ؕ اِیۡتُوۡنِىۡ بِكِتٰبٍ مِّنۡ قَبۡلِ هٰذَاۤ اَوۡ اَثٰرَةٍ مِّنۡ عِلۡمٍ اِنۡ كُنۡتُمۡ صٰدِقِيۡنَ ۝٥

6. තවද පුනරුත්ථාන දිනය තෙක් තමන්ට ප්‍රතිචාර නොදැක්විය හැක්කන්ව අල්ලාහ් වෙනුවට කැඳවන්නාට වඩා නොමග යන්නේ අන් කවරෙක්ද? තවද ඔවුන් මොවුන්ගේ කැඳවීම නොතකන්නන්ය.

وَمَنۡ اَضَلُّ مِمَّنۡ يَّدۡعُوۡا مِنۡ دُوۡنِ اللّٰهِ مَنۡ لَّا يَسۡتَجِيۡبُ لَهٗۤ اِلٰى يَوۡمِ الۡقِيٰمَةِ وَهُمۡ عَنۡ دُعَآئِهِمۡ غٰفِلُوۡنَ ۝٦

◆ප්‍රශංසා හිමිය, මහානුභාව සම්පන්නය.

وَإِذَا حُشِرَ النَّاسُ كَانُوا لَهُمْ أَعْدَآءً وَّكَانُوا بِعِبَادَتِهِمْ كٰفِرِينَ ۝٧

7. තවද මිනිස් වර්ගයා එක්රැස් කරනු ලබන කල්හි ඔවුහු(ව්‍යාජ දෙවිවරුන්) මොවුන්ට සතුරන් වන අතර, මොවුන්ගේ නැමදුමද ප්‍රතික්ෂේප කරන්නෝය.

وَإِذَا تُتْلٰى عَلَيْهِمْ اٰيٰتُنَا بَيِّنٰتٍ قَالَ الَّذِينَ كَفَرُوا لِلْحَقِّ لَمَّا جَآءَهُمْ ۙ هٰذَا سِحْرٌ مُّبِينٌ ۝٨

8. තවද අපගේ පැහැදිලි වදන් ඔවුනට පාරායනා කරනු ලබන කල්හි, අවිශ්වාස කරන අය, සත්‍යය ඔවුන් වෙත පැමිණි විට, 'මෙය ප්‍රත්‍යක්ෂ මායාවක්යැ'යි පවසන්නෝය.

أَمْ يَقُولُونَ افْتَرٰىهُ ۖ قُلْ إِنِ افْتَرَيْتُهُ فَلَا تَمْلِكُونَ لِي مِنَ اللّٰهِ شَيْئًا ۖ هُوَ أَعْلَمُ بِمَا تُفِيضُونَ فِيهِ ۖ كَفٰى بِهٖ شَهِيدًا بَيْنِي وَبَيْنَكُمْ ۖ وَهُوَ الْغَفُورُ الرَّحِيمُ ۝٩

9. 'ඔහු එය ගොතා ඇත්තේයැ'යි ඔවුන් කියන්නෝද? පවසන්න, 'මම එය ගොතා ඇත්තේ නම්, අල්ලාහ්ට එරෙහිව මා (දඬුවමින්) මුදවා ගැනීමට නුඹලාට කිසිසේත් නොහැක. නුඹලා නියැලී සිටින (නිෂ්ඵල) කථා ගැන ඔහු හොඳින් දන්නේය. මා හා නුඹලා අතර සාක්ෂිකරුවෙක් වශයෙන් ඔහු ප්‍රමාණවත්ය. තවද ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය'.

قُلْ مَا كُنْتُ بِدْعًا مِّنَ الرُّسُلِ وَمَآ أَدْرِي مَا يُفْعَلُ بِي وَلَا بِكُمْ ۖ إِنْ أَتَّبِعُ إِلَّا مَا يُوحٰى إِلَيَّ وَمَآ أَنَا إِلَّا نَذِيرٌ مُّبِينٌ ۝١٠

10. 'මම අමුතු දූතයෙක් නොවන්නෙමි. තවද මා හටත් නුඹලා හටත් (මෙලොව ජීවිතයෙහි) කුමක් කරනු ලැබේදැයි මා නොදනිමි. නමුත් මා වෙත අනාවරණය කරනු ලැබූ දේ පමණක් මම අනුගමනය කරමි. තවද මා පැහැදිලි අවවාද කරන්නෙකු මිස නැතැ'යි පවසන්න.

قُلْ أَرَءَيْتُمْ إِنْ كَانَ مِنْ عِنْدِ اللّٰهِ وَكَفَرْتُمْ بِهٖ وَشَهِدَ شَاهِدٌ مِّنْ بَنِيٓ إِسْرَآءِيلَ عَلٰى مِثْلِهٖ فَاٰمَنَ وَاسْتَكْبَرْتُمْ ۖ إِنَّ اللّٰهَ لَا يَهْدِي الْقَوْمَ الظّٰلِمِينَ ۝١١

11. අසන්න, 'මෙය අල්ලාහ් වෙතින්ය. තවද නුඹලා මෙය අවිශ්වාස කළෙහුය. එමෙන්ම ඉස්රාඊලයේ දරුවන්ගෙන් සාක්ෂිකරුවෙක් තමන් මෙන් කෙනෙකු(ගේ පැමිණීම)ට සාක්ෂි දැරුවේය. පසුව ඔහු විශ්වාස කළේය. එසේ තිබියදීත් නුඹලා උඩඟු වන්නේ නම් (නුඹලා සාධාරණ වන්නේ කෙසේදැ?)යි සිතා බැලුවෙහුද'. සැබැවින්ම අල්ලාහ් අදමිටු ජනතාවට මග නොපෙන්වන්නේය.

وَقَالَ الَّذِينَ كَفَرُوا لِلَّذِينَ آمَنُوا لَوْ كَانَ
خَيْرًا مَّا سَبَقُونَا إِلَيْهِ ۚ وَإِذْ لَمْ يَهْتَدُوا بِهِ
فَسَيَقُولُونَ هَٰذَا إِفْكٌ قَدِيمٌ ﴿١٢﴾

12. තවද අවිශ්වාස කළ අය විශ්වාස කළ අය ගැන, 'මෙය යහපත් දෙයක් වූයේ නම්, මෙය ලබා ගැනීමේදී ඔවුන්ට අපව අභිබවා යා නොහැකියැ'යි කියන්නෝය. තවද මොවුන් මෙමගින් මගපෙන්වීම නොලැබූ හෙයින්, 'මෙය පැරණි මුසාවකි'යි මොවුන් කියන්නෝය.

وَمِن قَبْلِهِ كِتَابُ مُوسَىٰ إِمَامًا وَرَحْمَةً ۚ
وَهَٰذَا كِتَابٌ مُّصَدِّقٌ لِّسَانًا عَرَبِيًّا لِّيُنذِرَ
الَّذِينَ ظَلَمُوا وَبُشْرَىٰ لِلْمُحْسِنِينَ ﴿١٣﴾

13. තවද මෙයට පෙර මූසාගේ පුස්තකය මගපෙන්වීමක් මෙන්ම දයාවක්ද විය. තවද මෙය (කුර්ආනය) වැරදි කරන්නන්ට අවවාද කරනු පිණිසද යහපත කරන්නන්ට සුභාරංචියක් ලෙසද (කලින් වූ දේව ලියවිලි) සනාථ කරන අරාබි බසින් වූ ග්‍රන්ථයකි.

إِنَّ الَّذِينَ قَالُوا رَبُّنَا اللَّهُ ثُمَّ اسْتَقَامُوا
فَلَا خَوْفٌ عَلَيْهِمْ وَلَا هُمْ يَحْزَنُونَ ﴿١٤﴾

14. සැබැවින්ම 'අපගේ අධිපතියාණන් අල්ලාහ්'යැයි පවසා පසුව ස්ථිරසාරව සිටින අය ගත්කල ඔවුනට කිසිදු බියක් නොවනු ඇත. තවද ඔවුන් ශෝක වන්නේද නැත.

أُولَٰئِكَ أَصْحَابُ الْجَنَّةِ خَالِدِينَ فِيهَا
جَزَاءً بِمَا كَانُوا يَعْمَلُونَ ﴿١٥﴾

15. ස්වර්ගයේ වැසියන් ඔවුන්මය. ඔවුහු එහි සදා වෙසෙන්නෝය. (එය) ඔවුන් කළ දේවල්වලට ප්‍රතිඵලයකි.

وَوَصَّيْنَا الْإِنسَانَ بِوَالِدَيْهِ إِحْسَانًا ۖ
حَمَلَتْهُ أُمُّهُ كُرْهًا وَوَضَعَتْهُ كُرْهًا ۖ
وَحَمْلُهُ وَفِصَالُهُ ثَلَاثُونَ شَهْرًا ۚ حَتَّىٰ إِذَا
بَلَغَ أَشُدَّهُ وَبَلَغَ أَرْبَعِينَ سَنَةً قَالَ
رَبِّ أَوْزِعْنِي أَنْ أَشْكُرَ نِعْمَتَكَ الَّتِي
أَنْعَمْتَ عَلَيَّ وَعَلَىٰ وَالِدَيَّ وَأَنْ أَعْمَلَ
صَالِحًا تَرْضَاهُ وَأَصْلِحْ لِي فِي ذُرِّيَّتِي ۖ

16. තවද තම දෙමාපියන්ව යහපත්ව සලකන ලෙස මිනිසාට අපි අණකර ඇත්තෙමු. ඔහුගේ මව ඔහුව වේදනාවෙන් උසුලන්නීය. එමෙන්ම වේදනාවෙන් ඔහුව ප්‍රසූත කරන්නීය. එමෙන්ම ඔහුව ඉසිලීමටද ඔහුගේ කිරි වැරීමටද තිස් මසක් ගත වේ. පසුව ඔහු තම සම්පූර්ණ වැඩිවියට පත්ව (වයස) අවුරුදු හතලිහක් ලඟා වූ විට ඔහු, 'මාගේ අධිපතියාණෙනි! මා වෙතද මගේ දෙමාපියන් වෙතද ඔබ පිරිනමා ඇති ඔබගේ අනුග්‍රහයට මා කෘතඥ වනු පිණිසද ඔබ තෘප්තිමත් වන යහපත් ක්‍රියා මා කිරීමටද මාහට භාග්‍යය දෙනු මැනව. තවද මාහට මාගෙන් පැවත එන්නන්ව ධාර්මිෂ්ඨකයින් කරනු මැනව. නියතවශයෙන්ම මා ඔබ

إِنِّي تُبْتُ إِلَيْكَ وَإِنِّي مِنَ الْمُسْلِمِينَ ﴿١٦﴾

වෙතටම හැරෙන්නෙමි. තවද ඇත්තෙන්ම මම (ඔබට) යටහත් පහත් වන්නන්ගෙන් වෙමි'යි පවසන්නේය.

أُولَٰئِكَ الَّذِينَ نَتَقَبَّلُ عَنْهُمْ أَحْسَنَ مَا عَمِلُوا وَنَتَجَاوَزُ عَنْ سَيِّئَاتِهِمْ فِي أَصْحَابِ الْجَنَّةِ ۖ وَعْدَ الصِّدْقِ الَّذِي كَانُوا يُوعَدُونَ ﴿١٧﴾

17. එවැන්නන්ය. ඔවුන්ගෙන් අපි යහපත් ක්‍රියා පිළිගෙන ඔවුන්ගේ බෙලහීන ක්‍රියා නොසළකා හරින්නෙමු. (ඔවුන්) ස්වර්ගයේ වැසියන් අතරය. මෙය ඔවුන්ට දෙන ලද සත්‍ය පොරොන්දුවකි.

وَالَّذِي قَالَ لِوَالِدَيْهِ أُفٍّ لَكُمَا أَتَعِدَانِنِي أَنْ أُخْرَجَ وَقَدْ خَلَتِ الْقُرُونُ مِنْ قَبْلِي وَهُمَا يَسْتَغِيثَانِ اللَّهَ وَيْلَكَ آمِنْ إِنَّ وَعْدَ اللَّهِ حَقٌّ فَيَقُولُ مَا هَٰذَا إِلَّا أَسَاطِيرُ الْأَوَّلِينَ ﴿١٨﴾

18. නමුත් තම දෙමාපියන්ට 'නුඹලා දෙදෙනා කෙරෙහි අහෝ දුකකි! මෙලහකටත් පරම්පරාවන් ගණනාවක් මට පෙර ඉකුත් වී තිබියදී මා (නැවත ජීවය ලබා) පිට කරනු ලබන්නේ යැයි නුඹලා මාව බිය ගන්වන්නෙහුදැ?'යි පවසන අයද වේ. එවිට ඔවුන් දෙදෙනා, 'නුඹට විනාශයයි! විශ්වාස කරනු. නියතවශයෙන්ම අල්ලාහ්ගේ පොරොන්දුව සත්‍යය යැ'යි (පවසමින්) අල්ලාහ්ගේ පිහිට පතා කන්නලව් කරන්නෝය. එහෙත් ඔහු 'මෙය පැරැන්නන්ගේ කථාන්තර මිස අන් කිසිවක් නොවේ' යැයි පවසන්නේය.

أُولَٰئِكَ الَّذِينَ حَقَّ عَلَيْهِمُ الْقَوْلُ فِي أُمَمٍ قَدْ خَلَتْ مِنْ قَبْلِهِمْ مِنَ الْجِنِّ وَالْإِنْسِ ۖ إِنَّهُمْ كَانُوا خَاسِرِينَ ﴿١٩﴾

19. එවැන්නන්ය, ඔවුන්ට පෙර වූ ජින් හා මිනිස් ජනසමාජයන්ට එරෙහිව සැබෑ වූ තීන්දුව ඔවුන්ටද සැබෑ විය. නියතවශයෙන්ම පාඩු විඳින්නන් ඔවුන්මය.

وَلِكُلٍّ دَرَجَاتٌ مِمَّا عَمِلُوا ۖ وَلِيُوَفِّيَهُمْ أَعْمَالَهُمْ وَهُمْ لَا يُظْلَمُونَ ﴿٢٠﴾

20. තවද සෑම කෙනෙකුටම ඔවුන් කළ දේ අනුව (තත්ත්වයන්හි) තරාතිරම් ඇත. තවද එය ඔහු ඔවුන්ගේ ක්‍රියාවන්ට සම්පූර්ණ ඵලවිපාක දෙනු පිණිසය. තවද ඔවුන්ට අසාධාරණ කරනු නොලබන්නේය.

وَيَوْمَ يُعْرَضُ الَّذِينَ كَفَرُوا عَلَى النَّارِ أَذْهَبْتُمْ طَيِّبَاتِكُمْ فِي حَيَاتِكُمُ الدُّنْيَا وَاسْتَمْتَعْتُمْ بِهَا فَالْيَوْمَ تُجْزَوْنَ عَذَابَ الْهُونِ بِمَا كُنْتُمْ تَسْتَكْبِرُونَ فِي الْأَرْضِ بِغَيْرِ الْحَقِّ وَبِمَا كُنْتُمْ تَفْسُقُونَ ﴿٢١﴾

21. තවද එදින අවිශ්වාස කළ අය ගින්න ඉදිරියට ගෙන එනු ලබන විට (ඔවුන් වෙත), 'නුඹලා නුඹලාගේ මෙලොව ජීවිතයෙහි නුඹලාගේ යහපත් දේවල් සියල්ල නැති කර ගත්තෙහුය. එමෙන්ම නුඹලා ඒවා තාවකාලිකව භුක්ති වින්දෙහුය. මෙදින නුඹලාට, නුඹලා පොළොවෙහි අසාධාරණව උඩඟු වූ හෙයින්ද නුඹලා කැරලිකාරව ක්‍රියා කළ හෙයින්ද දැන් නින්දිත දඬුවමකින් ප්‍රතිවිපාක දෙනු ලබන්නේයැ'(යි පවසනු ලැබේ).

وَاذْكُرْ أَخَا عَادٍ إِذْ أَنْذَرَ قَوْمَهُ بِالْأَحْقَافِ وَقَدْ خَلَتِ النُّذُرُ مِنْ بَيْنِ يَدَيْهِ وَمِنْ خَلْفِهِ أَلَّا تَعْبُدُوا إِلَّا اللَّهَ إِنِّي أَخَافُ عَلَيْكُمْ عَذَابَ يَوْمٍ عَظِيمٍ ﴿٢٢﴾

22. තවද ආද්ගේ සොහොයුරාව සිහිපත් කරන්න. ඔහු තම ජනතාවට වැලි කඳු අතරින් අවවාද කළ කල්හි, තවද ඔහුට පෙර සහ ඔහුගෙන් පසුව අවවාද කරන්නන්, 'අල්ලාහ් හැර අන් කිසිවක් නොනමදිනු. මම නුඹලා කෙරෙහි අති මහත්වූ දිනයේ දඬුවම පිළිබඳව බිය වන්නෙමි'යි (පවසමින්) කාලක්‍රියා කළහ.

قَالُوا أَجِئْتَنَا لِتَأْفِكَنَا عَنْ آلِهَتِنَا فَأْتِنَا بِمَا تَعِدُنَا إِنْ كُنْتَ مِنَ الصَّادِقِينَ ﴿٢٣﴾

23. ඔවුන්, 'අපගේ දෙවිවරුන්ගෙන් අපව ඉවත හැරවීමට නුඹ අප වෙත පැමිණියෙහිද? නුඹ සත්‍යවාදීන්ගෙන් නම් නුඹ කුමක් ගැන අපව බිය ගන්වන්නේද, එය අප වෙත ගෙන එනු'යි පැවසූහ.

قَالَ إِنَّمَا الْعِلْمُ عِنْدَ اللَّهِ وَأُبَلِّغُكُمْ مَا أُرْسِلْتُ بِهِ وَلَٰكِنِّي أَرَاكُمْ قَوْمًا تَجْهَلُونَ ﴿٢٤﴾

24. (එයට) ඔහු, 'නියතවශයෙන්ම (ඒ පිළිබඳ) දැනුම අල්ලාහ් වෙත පමණය. තවද මා කුමක් සමග එවන ලද්දේද එයම මා නුඹලාට දන්වා සිටිමි. එහෙත් මා නුඹලාව දකින්නේ (ඉතාමත්) අඥාන ජනතාවක් ලෙස යැ'යි කීවේය.

فَلَمَّا رَأَوْهُ عَارِضًا مُسْتَقْبِلَ أَوْدِيَتِهِمْ قَالُوا هَٰذَا عَارِضٌ مُمْطِرُنَا بَلْ هُوَ مَا

25. පසුව, ඔවුන් එය වලාකුළක් ලෙස ඔවුන්ගේ නිම්නයන් දෙසට පැමිණෙනු දුටු විට ඔවුන්, 'මෙය අප හට වැසි ලබා දෙන වලාකුළයැ'යි පැවසූහ.

اسْتَعْجَلْتُمْ بِهِ ۖ رِيحٌ فِيهَا عَذَابٌ أَلِيمٌ ۝٢٥

නොඑසේය, නමුත් නුඹලා මෙය කඩිනම් වීමට පැතූ දෙයකි. මෙය වේදනීය දඬුවමකින් යුත් සුළඟකි.

تُدَمِّرُ كُلَّ شَيْءٍ بِأَمْرِ رَبِّهَا فَأَصْبَحُوا لَا يُرَىٰ إِلَّا مَسَاكِنُهُمْ ۚ كَذَٰلِكَ نَجْزِي الْقَوْمَ الْمُجْرِمِينَ ۝٢٦

26. එය තම අධිපතියාණන්ගේ විධානයෙන් සියල්ල විනාශ කරන්නේය. තවද උදෑසන ඔවුන්ගේ වාසස්ථානයන් හැරෙන්නට අන් කිසිවක් එහි දැකිය නොහැකි වන ආකාරයට ඔවුන් පත්වූහ. මෙලෙස අපි වැරදිකාර ජනතාවට ප්‍රතිවිපාක දෙන්නෙමු.

وَلَقَدْ مَكَّنَّاهُمْ فِيمَا إِنْ مَكَّنَّاكُمْ فِيهِ وَجَعَلْنَا لَهُمْ سَمْعًا وَأَبْصَارًا وَأَفْئِدَةً فَمَا أَغْنَىٰ عَنْهُمْ سَمْعُهُمْ وَلَا أَبْصَارُهُمْ وَلَا أَفْئِدَتُهُمْ مِنْ شَيْءٍ إِذْ كَانُوا يَجْحَدُونَ بِآيَاتِ اللَّهِ وَحَاقَ بِهِمْ مَا كَانُوا بِهِ يَسْتَهْزِئُونَ ۝٢٧

27. තවද අපි නුඹලාව ශක්තිමත් කර නොමැති දෙයෙහි අපි ඔවුන්ව ශක්තිමත් කළෙමු. තවද අපි ඔවුනට කන්ද ඇස්ද හදවත්ද දුන්නෙමු. නමුත් ඔවුන් අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කළ බැවින් ඔවුන්ගේ කන්ද ඔවුන්ගේ ඇස්ද ඔවුන්ගේ හදවත්ද ඔවුනට ඵලක් නොවිය. තවද ඔවුන් සරදම් කරමින් සිටි දේ ඔවුන්ව වෙළා ගත්තේය.

وَلَقَدْ أَهْلَكْنَا مَا حَوْلَكُمْ مِنَ الْقُرَىٰ وَصَرَّفْنَا الْآيَاتِ لَعَلَّهُمْ يَرْجِعُونَ ۝٢٨

28. තවද නියතවශයෙන්ම අපි නුඹලාගේ වටාපිටාවේ ඇති සියළු නගරයන් විනාශ කළෙමු. තවද ඔවුන් (අප වෙත) හැරෙනු පිණිස අපි සළකුණු ඉතා පැහැදිලිව විස්තර කර ඇත්තෙමු.

فَلَوْلَا نَصَرَهُمُ الَّذِينَ اتَّخَذُوا مِنْ دُونِ اللَّهِ قُرْبَانًا آلِهَةً ۖ بَلْ ضَلُّوا عَنْهُمْ ۚ وَذَٰلِكَ إِفْكُهُمْ وَمَا كَانُوا يَفْتَرُونَ ۝٢٩

29. පසුව ඔවුන් අල්ලාහ් හැර කවුරුන්ව, සමීපත්වය ලබාගැනීමට දෙවිවරුන් ලෙස ගත්තේද ඒ අය ඔවුනට උදව් නොකළේ මන්ද? නොඑසේය, ඒ අය ඔවුන්ගෙන් අතුරුදහන් වූහ. මෙය ඔවුන්ගේ මුසාව සහ ඔවුන් ගෙතූ දේ හේතුවෙනි.

وَإِذْ صَرَفْنَا إِلَيْكَ نَفَرًا مِنَ الْجِنِّ

30. තවද කුර්ආනයට සවන් දීමට කැමති වූ ජින්වරුන්ගෙන් පිරිසක්

يَسْتَمِعُونَ الْقُرْاٰنَ ۚ فَلَمَّا حَضَرُوْهُ قَالُوْٓا اَنْصِتُوْا ۚ فَلَمَّا قُضِيَ وَلَّوْا اِلٰى قَوْمِهِمْ مُّنْذِرِيْنَ ﴿٣٠﴾

අප ඔබ වෙත හැරවූ අවස්ථාව (සිහිපත් කරන්න). ඔවුන් එහි (පාරායනයට) පෙනී සිටිය විට ඔවුන් (එකිනෙකාට), 'නිශ්ශබ්ද වනු (එයට සවන් දෙනු)'යි කීහ. තවද එය අවසන් වූ විට ඔවුන් තම ජනතාව වෙත අවවාදකරුවන් ලෙස ආපසු ගියහ.

قَالُوْا يٰقَوْمَنَآ اِنَّا سَمِعْنَا كِتٰبًا اُنْزِلَ مِنْۢ بَعْدِ مُوْسٰى مُصَدِّقًا لِّمَا بَيْنَ يَدَيْهِ يَهْدِيْٓ اِلَى الْحَقِّ وَاِلٰى طَرِيْقٍ مُّسْتَقِيْمٍ ﴿٣١﴾

31. ඔවුන්, 'එම්බල අපගේ ජනතාවනි! මූසාට පසු පහළ කරනු ලැබූ ග්‍රන්ථයකට අපි සවන් දී ඇත්තෙමු. එය එයට පෙර ඇති දේ පරිපූර්ණ කරන්නකි. එය සත්‍ය වෙතද සෘජු මග වෙතද යොමු කරන්නක්යැ'යි පැවසූහ.

يٰقَوْمَنَآ اَجِيْبُوْا دَاعِيَ اللّٰهِ وَاٰمِنُوْا بِهٖ يَغْفِرْ لَكُمْ مِّنْ ذُنُوْبِكُمْ وَيُجِرْكُمْ مِّنْ عَذَابٍ اَلِيْمٍ ﴿٣٢﴾

32. 'එම්බල අපගේ ජනතාවනි! අල්ලාහ් වෙත කැඳවන්නාට ප්‍රතිචාර දක්වනු. තවද ඔහු කෙරෙහි විශ්වාස කරනු. එහි ප්‍රතිඵලයක් වශයෙන් ඔහු (අල්ලාහ්) නුඹලාගේ පව්වලට නුඹලාට සමාව දෙන්නේය. තවද නුඹලාව වේදනීය දඬුවමින් ආරක්ෂා කරන්නේය'.

وَمَنْ لَّا يُجِبْ دَاعِيَ اللّٰهِ فَلَيْسَ بِمُعْجِزٍ فِي الْاَرْضِ وَلَيْسَ لَهٗ مِنْ دُوْنِهٖٓ اَوْلِيَآءُ ۗ اُولٰٓئِكَ فِيْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٣٣﴾

33. 'තවද කවුරුන් හෝ අල්ලාහ් වෙත කැඳවන්නාට ප්‍රතිචාර නොදක්වන්නේද ඔහුට පොළොවෙහි (අල්ලාහ්ව) පරාජය කළ නොහැක. තවද ඔහු හැර ඔහුට ආරක්ෂකයින් නොමැත. එවැන්නන් සිටින්නේ ප්‍රත්‍යක්ෂ නොමගෙහිමය'.

اَوَلَمْ يَرَوْا اَنَّ اللّٰهَ الَّذِيْ خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ وَلَمْ يَعْيَ بِخَلْقِهِنَّ بِقٰدِرٍ عَلٰٓى اَنْ يُّحْيِيَ الْمَوْتٰى ۗ بَلٰٓى اِنَّهٗ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ﴿٣٤﴾

34. අහස් සහ පොළොව මවා ඇත්තේ අල්ලාහ් යැයිද ඒවා මැවීමෙහි වෙහෙසට පත් නොවන ඔහු මළවුන්ට ජීවය දීමට බලය ඇත්තා යැයිද ඔවුන් නොදකින්නෝද? එසේය, සැබැවින්ම ඔහු සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

وَيَوْمَ يُعْرَضُ الَّذِيْنَ كَفَرُوْا عَلَى النَّارِ ۗ

35. තවද එදින අවිශ්වාස කළ අය ගින්න ඉදිරියට ගෙන එනු ලබන විට

اَلَيْسَ هٰذَا بِالْحَقِّ ؕ قَالُوْا بَلٰى وَرَبِّنَا ؕ قَالَ فَذُوْقُوا الْعَذَابَ بِمَا كُنْتُمْ تَكْفُرُوْنَ ﴿٣٥﴾

(ඔවුන්ගෙන්), 'මෙය සත්‍ය නොවේ දැයි?' (අසනු ලැබේ). ඔවුහු, 'එසේය, අපගේ අධිපතියාණන් මත සාක්කි'යැයි පවසන්නෝය. (එවිට) ඔහු, 'එසේ නම් නුඹලා අවිශ්වාස කළ හෙයින්, දඬුවම විඳිනු'යි පවසන්නේය.

فَاصْبِرْ كَمَا صَبَرَ اُولُوا الْعَزْمِ مِنَ الرُّسُلِ وَلَا تَسْتَعْجِلْ لَّهُمْ ؕ كَاَنَّهُمْ يَوْمَ يَرَوْنَ مَا يُوْعَدُوْنَ ۙ لَمْ يَلْبَثُوْۤا اِلَّا سَاعَةً مِّنْ نَّهَارٍ ؕ بَلٰغٌ ۚ فَهَلْ يُهْلَكُ اِلَّا الْقَوْمُ الْفٰسِقُوْنَ ﴿٣٦﴾

36. දැඩි අධිෂ්ඨානයෙන් යුත් දූතයින් ඉවසිලිමත් වූවා සේ ඉවසිලිමත්ව සිටින්න. තවද ඔවුන් පිළිබඳව ඉක්මන් නොවන්න. ඔවුන් අවවාද කරනු ලැබූ දේ සමග ඔවුන් එදින දකින කල්හි, ඔවුන් දවසකින් එක් හෝරාවකට වඩා තමන් ගත කර නොමැති සේ එය ඔවුනට පෙනී යනු ඇත. මෙය දන්වන ලද (අවවාදයකි). එබැවින් අකීකරු ජනතාව මිස අන් අය විනාශ කරනු ලබන්නෝද?




මුහම්මද්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلَّذِيۡنَ كَفَرُوۡا وَصَدُّوۡا عَنۡ سَبِيۡلِ اللّٰهِ اَضَلَّ اَعۡمَالَهُمۡ ②

2. අවිශ්වාස කොට අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වන අය ගත්කළ ඔවුන්ගේ ක්‍රියාවන් ඔහු නිෂ්ඵල කරන්නේය.

وَالَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ وَاٰمَنُوۡا بِمَا نُزِّلَ عَلٰى مُحَمَّدٍ وَّهُوَ الۡحَـقُّ مِنۡ رَّبِّهِمۡ‌ ۙ كَفَّرَ عَنۡهُمۡ سَيِّاٰتِهِمۡ وَاَصۡلَحَ بَالَهُمۡ ③

3. තවද විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කර එමෙන්ම මුහම්මද් වෙත පහළ කරනු ලැබූ දෙයම ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යයක් යැයි විශ්වාස කරන අය ගත්කල ඔහු ඔවුන්ගේ නපුර ඔවුන්ගෙන් ඉවත් කොට ඔවුන්ගේ තත්ත්වය සංශෝධනය කරන්නේය.

ذٰلِكَ بِاَنَّ الَّذِيۡنَ كَفَرُوا اتَّبَعُوا الۡبَاطِلَ وَاَنَّ الَّذِيۡنَ اٰمَنُوا اتَّبَعُوا الۡحَـقَّ مِنۡ رَّبِّهِمۡ‌ ؕ كَذٰلِكَ يَضۡرِبُ اللّٰهُ لِلنَّاسِ اَمۡثَالَهُمۡ ④

4. එයට හේතුව අවිශ්වාස කරන අය අසත්‍යය අනුගමනය කරන නිසාත් විශ්වාස කරන අය තමන්ගේ අධිපතියාණන්ගෙන් වන සත්‍යය අනුගමනය කරන නිසාත්ය. මෙලෙස අල්ලාහ් මිනිසුන් හට ඔවුන්ගේ උපමා ගෙන හැර දක්වන්නේය.

فَاِذَا لَقِيۡتُمُ الَّذِيۡنَ كَفَرُوۡا فَضَرۡبَ الرِّقَابِؕ حَتّٰٓى اِذَاۤ اَثۡخَنۡتُمُوۡهُمۡ فَشُدُّوا الۡوَثَاقَ ۙ فَاِمَّا مَنًّۢا بَعۡدُ وَاِمَّا فِدَآءً حَتّٰى تَضَعَ الۡحَـرۡبُ اَوۡزَارَهَا ۛ ذٰلِكَ ؕۛ وَلَوۡ يَشَآءُ اللّٰهُ لَانْتَصَرَ مِنۡهُمۡ وَلٰـكِنۡ لِّيَبۡلُوَا۟ بَعۡضَكُمۡ بِبَعۡضٍ‌ؕ وَالَّذِيۡنَ

5. එමෙන්ම නුඹලා (විධිමත් සටනේදී) අවිශ්වාස කළවුන්ව මුණ ගැසුනු විටදී ඔවුන්ගේ ගෙලට පහර දෙනු. යම්තාක්දයත් නුඹලා ඔවුන්ගේ රුධිරය වැගුරුවන තුරුය. පසුව ඔවුන්ව විලංගුලා තබාගනු. ඉන්පසුව අනුග්‍රහයක් (ලෙස) හෝ වන්දියක් (ලබාගෙන) හෝ (ඔවුන්ව මුදා හරිනු). එය, යුද්ධය තම ආයුධ බිම හෙළන තාක්ය. එයම (නියෝගය) වේ. තවද අල්ලාහ් අභිමත කළේ නම් ඔහුට ඔවුන්ගෙන් නිශ්චිතවම පළිගන්නට තිබුණි. නමුත් ඔහු (අභිමත වී ඇත්තේ) නුඹලාගෙන් සමහරෙකුව

قُتِلُوا فِي سَبِيلِ اللّٰهِ فَلَنْ يُّضِلَّ اَعْمَالَهُمْ ﴿٥﴾

තවත් සමහරෙකු ලවා පිරික්සීමටය. එමෙන්ම කවුරුන් හෝ අල්ලාහ්ගේ මාර්ගයෙහි ඝාතනය කරනු ලබන්නේද ඔහු කිසිවිටෙකත් ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල නොකරන්නේය.

سَيَهْدِيْهِمْ وَيُصْلِحُ بَالَهُمْ ﴿٦﴾

6. ඔහු ඔවුන්ට මග පෙන්වන අතර ඔවුන්ගේ තත්ත්වය සංශෝධනය කරන්නේය.

وَيُدْخِلُهُمُ الْجَنَّةَ عَرَّفَهَا لَهُمْ ﴿٧﴾

7. තවද ඔවුන් සඳහා අති උසස් කළාවූ ස්වර්ගයෙහි ඔහු ඔවුන්ව ඇතුළු කරන්නේය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِنْ تَنْصُرُوا اللّٰهَ يَنْصُرْكُمْ وَيُثَبِّتْ اَقْدَامَكُمْ ﴿٨﴾

8. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ්(ගේ මාර්ගය)ට උදව් කරන්නේ නම්, ඔහුද නුඹලාට උදව් කර නුඹලාගේ පාදයන් ස්ථිරසාර කරන්නේය.

وَالَّذِيْنَ كَفَرُوْا فَتَعْسًا لَّهُمْ وَاَضَلَّ اَعْمَالَهُمْ ﴿٩﴾

9. නමුත් අවිශ්වාස කළවුන් ගත්කල ඔවුන්ට විනාශයම අත් වේ. ඔහු ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල කරන්නේය.

ذٰلِكَ بِاَنَّهُمْ كَرِهُوْا مَاۤ اَنْزَلَ اللّٰهُ فَاَحْبَطَ اَعْمَالَهُمْ ﴿١٠﴾

10. එය ඔවුන් අල්ලාහ් පහළ කළ දේ පිළිකුල් කළ හෙයිනි. එබැවින් ඔහු ඔවුන්ගේ ක්‍රියාවන් නිශ්ඵල කරන්නේය.

اَفَلَمْ يَسِيْرُوْا فِي الْاَرْضِ فَيَنْظُرُوْا كَيْفَ كَانَ عَاقِبَةُ الَّذِيْنَ مِنْ قَبْلِهِمْ ؕ دَمَّرَ اللّٰهُ عَلَيْهِمْ ۫ وَلِلْكٰفِرِيْنَ اَمْثَالُهَا ﴿١١﴾

11. ඔවුන්ට පෙර සිටියවුන්ගේ අවසානය කෙසේ වීදැයි ඔවුන් දැක ගනු පිණිස ඔවුන් පොළොවෙහි සංචාරය නොකළේද? අල්ලාහ් ඔවුන්ව (සහමුලින්ම) විනාශ කළේය. තවද අවිශ්වාසිතයින්ටද (සිදුවන්නේ) ඒ හා සමාන දෙයකි.

ذٰلِكَ بِاَنَّ اللّٰهَ مَوْلَى الَّذِيْنَ اٰمَنُوْا وَاَنَّ الْكٰفِرِيْنَ لَا مَوْلٰى لَهُمْ ﴿١٢﴾ ع

12. එය මන්දයත් විශ්වාස කළ අයගේ ආරක්ෂකයා අල්ලාහ් වන බැවිනි. තවද අවිශ්වාසිතයින් ගත් කළ නියතවශයෙන්ම ඔවුනට කිසිදු ආරක්ෂකයෙකු නොමැත.

13. ඇත්තෙන්ම අල්ලාහ්, විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අයව පහළින් ගලා බස්නා ගංගාවන්ගෙන් යුත් උද්‍යානයන්හි ඇතුළු වීමට සලස්වන්නේය. නමුත් අවිශ්වාස කළ අය (මෙලොවෙහි) තාවකාලිකව භුක්ති විඳති. තවද ඔවුන් ගවසතුන් අනුභව කරන්නාක් මෙන් අනුභව කරති. තවද ගින්න ඔවුන්ගේ වාසස්ථානය වේ.

إِنَّ اللَّهَ يُدْخِلُ الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ ۖ وَالَّذِينَ كَفَرُوا يَتَمَتَّعُونَ وَيَأْكُلُونَ كَمَا تَأْكُلُ الْأَنْعَامُ وَالنَّارُ مَثْوًى لَّهُمْ ﴿١٣﴾

14. තවද ඔබව පලවා හැරිය ඔබගේ නගරයට වඩා බලවත් නගරයන් කොපමණක් අපි විනාශ කළෙමුද! ඔවුනට කිසිදු උදව්කරුවෙකු නොවීය.

وَكَأَيِّن مِّن قَرْيَةٍ هِيَ أَشَدُّ قُوَّةً مِّن قَرْيَتِكَ الَّتِي أَخْرَجَتْكَ أَهْلَكْنَاهُمْ فَلَا نَاصِرَ لَهُمْ ﴿١٤﴾

15. තම අධිපතියාණන්ගෙන් පැහැදිලි සාධකයක් කෙරෙහි ස්ථිරව සිටින අයෙක්, තම නපුරු ක්‍රියාවන් තමන්ට අලංකාර ලෙස පෙනීමට සලස්වනු ලැබ එමෙන්ම තම නරක අභිලාෂයන් අනුගමනය කරන අයෙකුට සමාන විය හැකිද?

أَفَمَن كَانَ عَلَىٰ بَيِّنَةٍ مِّن رَّبِّهِ كَمَن زُيِّنَ لَهُ سُوءُ عَمَلِهِ وَاتَّبَعُوا أَهْوَاءَهُم ﴿١٥﴾

16. බියබැතිමතුන් හට පොරොන්දු වන ලද ස්වර්ගයේ උපමාව (මෙසේය). එහි අපවිත්‍ර නොවන ජලයෙන් යුතු ගංගාවන්ද රසය වෙනස් නොවන්නාවූ කිරි ගංගාවන්ද පානය කරන්නන්ට මිහිරක් ගෙන දෙන මධු ගංගාවන්ද එමෙන්ම පිරිසිදු මී පැණියෙන් යුතු ගංගාවන්ද ඇත. තවද එහි ඔවුන්ට සියළු (වර්ගයේ) පළතුරුද ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් ක්ෂමාවද ලැබෙන්නේය. (එවන් ආශිර්වාදිත සැප විඳින්නන්) උතුරන ජලය පානයට දෙනු ලැබ එය තමන්ගේ බඩවැල් ඉරී යන්නාවූ ගින්නෙහි දිගුකල් වාසය කරන අය මෙන් වන්නෝද?

مَّثَلُ الْجَنَّةِ الَّتِي وُعِدَ الْمُتَّقُونَ ۖ فِيهَا أَنْهَارٌ مِّن مَّاءٍ غَيْرِ آسِنٍ وَأَنْهَارٌ مِّن لَّبَنٍ لَّمْ يَتَغَيَّرْ طَعْمُهُ وَأَنْهَارٌ مِّنْ خَمْرٍ لَّذَّةٍ لِّلشَّارِبِينَ وَأَنْهَارٌ مِّنْ عَسَلٍ مُّصَفًّى ۖ وَلَهُمْ فِيهَا مِن كُلِّ الثَّمَرَاتِ وَمَغْفِرَةٌ مِّن رَّبِّهِمْ ۖ كَمَنْ هُوَ خَالِدٌ فِي النَّارِ وَسُقُوا مَاءً حَمِيمًا فَقَطَّعَ أَمْعَاءَهُمْ ﴿١٦﴾

17. තවද ඔවුන් අතර ඔබට සවන් දෙන ඇතැම් අයද සිටිති. එහෙත් ඔවුන් ඔබගෙන් ඉවත්ව ගියපසු ඔවුන් ඥානය දෙන ලද්දන්ගෙන්, 'ඔහු මේ දැන් කුමක් කීවේද,'යි අසති. එවන්නන්ගේ හදවත්හි අල්ලාහ් මුද්‍රා තබා ඇත්තේය. තවද ඔවුන් තම නරක අභිලාෂයන් අනුගමනය කරන්නෝය.

وَمِنْهُم مَّن يَسْتَمِعُ إِلَيْكَ ۖ حَتَّىٰ إِذَا خَرَجُوا مِنْ عِندِكَ قَالُوا لِلَّذِينَ أُوتُوا الْعِلْمَ مَاذَا قَالَ آنِفًا ۚ أُولَٰئِكَ الَّذِينَ طَبَعَ اللَّهُ عَلَىٰ قُلُوبِهِمْ وَاتَّبَعُوا أَهْوَاءَهُمْ ﴿١٧﴾

18. තවද යහමග පිළිපදින අයව ඔහු එම යහමගෙහි තවතවත් දියුණුවන්නට සලස්වන්නේය. තවද ඔවුන්ගේ (තත්ත්වය අනුව) බියබැතිමත්කම ඔවුනට පිරිනමන්නේය.

وَالَّذِينَ اهْتَدَوْا زَادَهُمْ هُدًى وَآتَاهُمْ تَقْوَاهُمْ ﴿١٨﴾

19. ඔවුන් වෙත එම හෝරාව සැණෙකින් පැමිණිය යුතුයැයි ඔවුන් අපේක්ෂා කරනවා මිස අන්කිසිවක් නැත. එහි පෙර නිමිති දැනටමත් පැමිණ ඇත. නමුත් ඒවා ඔවුන් වෙත පැමිණි විට ඔවුන්ගේ අනුශාසනාව ඔවුනට කුමන ඵලක් වේද?

فَهَلْ يَنظُرُونَ إِلَّا السَّاعَةَ أَن تَأْتِيَهُم بَغْتَةً ۖ فَقَدْ جَاءَ أَشْرَاطُهَا ۚ فَأَنَّىٰ لَهُمْ إِذَا جَاءَتْهُمْ ذِكْرَاهُمْ ﴿١٩﴾

20. එබැවින් අල්ලාහ් හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නැති බව දැනගන්න. තවද ඔබගේ බෙලහීනතාවයට ක්ෂමාව අයැදින්න. එමෙන්ම විශ්වාසිත පුරුෂයින් සහ විශ්වාසිත ස්ත්‍රීන් වෙනුවෙන් (අයැදින්න). තවද නුඹලා සැරිසරන ස්ථානයද නුඹලාගේ වාසස්ථානයද අල්ලාහ් දන්නේය.

فَاعْلَمْ أَنَّهُ لَا إِلَٰهَ إِلَّا اللَّهُ وَاسْتَغْفِرْ لِذَنبِكَ وَلِلْمُؤْمِنِينَ وَالْمُؤْمِنَاتِ ۗ وَاللَّهُ يَعْلَمُ مُتَقَلَّبَكُمْ وَمَثْوَاكُمْ ﴿٢٠﴾ ع

21. '(සටන සම්බන්ධව) සූරාවක් (පරිච්ඡේදයක්) පහළ නොකරන ලද්දේ මන්ද,?'යි විශ්වාස කළ අය පවසන්නෝය. නමුත් තීරණාත්මක සූරාවක් (පරිච්ඡේදයක්) පහළ කරනු ලැබ එමෙන්ම එහි සටන ගැන සඳහන් කරනු ලැබූ විට, හදවත්හි රෝගය ඇති අය මරණාසන්නයේ සිහි විකල්ව බලන කෙනෙකු මෙන්

وَيَقُولُ الَّذِينَ آمَنُوا لَوْلَا نُزِّلَتْ سُورَةٌ ۖ فَإِذَا أُنزِلَتْ سُورَةٌ مُّحْكَمَةٌ وَذُكِرَ فِيهَا الْقِتَالُ ۙ رَأَيْتَ الَّذِينَ فِي قُلُوبِهِم مَّرَضٌ يَنظُرُونَ إِلَيْكَ نَظَرَ الْمَغْشِيِّ

عَلَيْهِ مِنَ الْمَوْتِ ۖ فَأَوْلَىٰ لَهُمْ ﴿٢١﴾

ඔබ දෙස බැලීම ඔබ දකින්නෙහිය. එබැවින් ඔවුනට විනාශය අත්වේවා!

طَاعَةٌ وَقَوْلٌ مَعْرُوفٌ ۚ فَإِذَا عَزَمَ الْأَمْرُ فَلَوْ صَدَقُوا اللَّهَ لَكَانَ خَيْرًا لَهُمْ ﴿٢٢﴾

22. අවනතභාවය සහ කාරුණික වදන (ඔවුනට යහපතකි). තවද කාරණය ස්ථිර වූ කල්හි ඔවුන් අල්ලාහ් ඉදිරියේ සත්‍යවන්තයින් වූයේ නම්, එය ඔවුනට යහපත්ය.

فَهَلْ عَسَيْتُمْ إِنْ تَوَلَّيْتُمْ أَنْ تُفْسِدُوا فِي الْأَرْضِ وَتُقَطِّعُوا أَرْحَامَكُمْ ﴿٢٣﴾

23. එසේ නුඹලා බලයෙහි පත් කරනු ලැබුවේ නම්, පොළොවෙහි කලබල ඇති කරමින් නුඹලාගේ ඥාති සම්බන්ධකම් බිඳ දමන්නෙහුද?

أُولَٰئِكَ الَّذِينَ لَعَنَهُمُ اللَّهُ فَأَصَمَّهُمْ وَأَعْمَىٰ أَبْصَارَهُمْ ﴿٢٤﴾

24. මෙවැන්නන්ය. අල්ලාහ් මොවුන් මත ශාපකර මොවුන්ව බිහිරි බවට පත් කර මොවුන්ගේ පෙනීමද අන්ධ කළේය.

أَفَلَا يَتَدَبَّرُونَ الْقُرْآنَ أَمْ عَلَىٰ قُلُوبٍ أَقْفَالُهَا ﴿٢٥﴾

25. එසේනම්, ඔවුන් කුර්ආනය පිළිබඳව ඕනෑකමින් සිතා නොබලන්නෝද? නැත්නම් ඔවුන්ගේ හදවත් ඇතුලතින් අගුළු ලා තිබේද?

إِنَّ الَّذِينَ ارْتَدُّوا عَلَىٰ أَدْبَارِهِمْ مِنْ بَعْدِ مَا تَبَيَّنَ لَهُمُ الْهُدَى ۙ الشَّيْطَانُ سَوَّلَ لَهُمْ ۖ وَأَمْلَىٰ لَهُمْ ﴿٢٦﴾

26. නියතවශයෙන්ම තමන්ට යහමාර්ගය ප්‍රත්‍යක්ෂ වූවායින් පසු පිටුපා ඉවත්ව යන්නන්ව, ෂෛයිතාන් (ඔවුන්ගේ ක්‍රියාවන්) ඔවුනට අලංකාර කොට දක්වා ඔවුනට පුහු ආශාවන් ඇති කරන්නේය.

ذَٰلِكَ بِأَنَّهُمْ قَالُوا لِلَّذِينَ كَرِهُوا مَا نَزَّلَ اللَّهُ سَنُطِيعُكُمْ فِي بَعْضِ الْأَمْرِ ۖ وَاللَّهُ يَعْلَمُ إِسْرَارَهُمْ ﴿٢٧﴾

27. ඒ මන්දයත් ඔවුන් අල්ලාහ් පහළ කළ දේ කෙරෙහි වෛර කරන අයවෙත, 'සමහර කරුණු පිළිබඳව අපි නුඹලාට අවනත වන්නෙමු'යි පැවසූ නිසාය. තවද අල්ලාහ් ඔවුන්ගේ රහස් දන්නේය.

فَكَيْفَ إِذَا تَوَفَّتْهُمُ الْمَلَائِكَةُ يَضْرِبُونَ وُجُوهَهُمْ وَأَدْبَارَهُمْ ﴿٢٨﴾

28. නමුත් සුරදූතයින් ඔවුන්ගේ මුහුණු වලට සහ ඔවුන්ගේ පිටට පහර දෙමින් ඔවුන්ව මරණයට පත් කරන කල්හි (ඔවුන්ගේ තත්ත්වය) කෙසේ වේද?

29. ඒ මන්දයත් ඔවුන් අල්ලාහ් කෝප වූ දේ අනුගමනය කර ඔහුගේ කැමැත්ත පිළිකුල් කළ නිසාය. එබැවින් ඔහු ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල කළේය.

ذٰلِكَ بِاَنَّهُمُ اتَّبَعُوْا مَآ اَسْخَطَ اللّٰهَ وَكَرِهُوْا رِضْوَانَهٗ فَاَحْبَطَ اَعْمَالَهُمْ ﴿٢٩﴾

30. කවුරුන්ගේ හදවත්හි රෝගයක් ඇත්තේද, ඔවුන්ගේ ද්වේෂය අල්ලාහ් හෙළි නොකරන්නේ යැයි ඔවුන් සිතන්නෝද?

اَمْ حَسِبَ الَّذِيْنَ فِيْ قُلُوْبِهِمْ مَّرَضٌ اَنْ لَّنْ يُّخْرِجَ اللّٰهُ اَضْغَانَهُمْ ﴿٣٠﴾

31. තවද අප අභිමත වූයේ නම්, නියතවශයෙන්ම අපි ඔවුන්ව ඔබට පෙන්වා දෙන්නෙමු. එවිට ඔබ ඔවුන්ව ඔවුන්ගේ සළකුණුවලින් හඳුනා ගන්නේය. තවද නියතවශයෙන්ම ඔබ (ඔවුන්ගේ) කතා ස්වරයෙන්ද ඔවුන්ව හඳුනා ගන්නේය. තවද අල්ලාහ් ඔබගේ ක්‍රියාවන් මැනැවින් දන්නේය.

وَلَوْ نَشَآءُ لَاَرَيْنٰكَهُمْ فَلَعَرَفْتَهُمْ بِسِيْمٰهُمْ ؕ وَلَتَعْرِفَنَّهُمْ فِيْ لَحْنِ الْقَوْلِ ؕ وَاللّٰهُ يَعْلَمُ اَعْمَالَكُمْ ﴿٣١﴾

32. තවද නුඹලා අතරින් දැඩි පරිශ්‍රමයෙහි යෙදෙන්නන්වද ඉවසිලිවන්තයින්වද අප දැනගන්නා තුරු නියතවශයෙන්ම අපි නුඹලාව පිරික්සන්නෙමු. තවද අපි නුඹලාගේ සැබෑ තත්ත්වයන් (පිරික්සුම මගින්) හෙළි කරන්නෙමු.

وَلَنَبْلُوَنَّكُمْ حَتّٰى نَعْلَمَ الْمُجٰهِدِيْنَ مِنْكُمْ وَالصّٰبِرِيْنَ ۙ وَنَبْلُوَا۟ اَخْبَارَكُمْ ﴿٣٢﴾

33. නියතවශයෙන්ම කවුරුන් හෝ අවිශ්වාස කොට අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වා එමෙන්ම තමන්ට යහමග ප්‍රත්‍යක්ෂ වූවායින් පසු දූතයාට සතුරුකම් කරන්නේද, ඔවුනට කිසිසේත්ම අල්ලාහ්ට කිසිදු හානියක් කිරීමට නොහැක. තවද ඔහු ඔවුන්ගේ ක්‍රියාවන් නිෂ්ඵල කරන්නේය.

اِنَّ الَّذِيْنَ كَفَرُوْا وَصَدُّوْا عَنْ سَبِيْلِ اللّٰهِ وَشَآقُّوا الرَّسُوْلَ مِنْۢ بَعْدِ مَا تَبَيَّنَ لَهُمُ الْهُدٰى ۙ لَنْ يَّضُرُّوا اللّٰهَ شَيْــًٔا ؕ وَسَيُحْبِطُ اَعْمَالَهُمْ ﴿٣٣﴾

34. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ට අවනත වනු. තවද දූතයාටද අවනත වනු. තවද නුඹලාගේ ක්‍රියාවන් අපතේ යාමට ඉඩ නොහරිනු.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اَطِيْعُوا اللّٰهَ وَاَطِيْعُوا الرَّسُوْلَ وَلَا تُبْطِلُوْۤا اَعْمَالَكُمْ ﴿٣٤﴾

35. නියතවශයෙන්ම අවිශ්වාස කොට අල්ලාහ්ගේ මාර්ගයෙන් (මිනිසුන්ව) වළක්වා පසුව අවිශ්වාසිතව මරණයට පත්වූවන් ගත්කල අල්ලාහ්

اِنَّ الَّذِيْنَ كَفَرُوْا وَصَدُّوْا عَنْ سَبِيْلِ اللّٰهِ ثُمَّ مَاتُوْا وَهُمْ كُفَّارٌ فَلَنْ يَّغْفِرَ اللّٰهُ

لَهُمْ ﴿٣٥﴾

ඔවුනට කිසිවිටෙකත් ක්‍ෂමාව නොදෙන්නේය.

فَلَا تَهِنُوا وَتَدْعُوا إِلَى السَّلْمِ ۚ وَأَنتُمُ الْأَعْلَوْنَ ۚ وَاللَّهُ مَعَكُمْ وَلَن يَتِرَكُمْ أَعْمَالَكُمْ ﴿٣٦﴾

36. එබැවින් නුඹලා සාමය වෙත කැඳවීමෙහි මන්දෝත්සාහි නොවනු. තවද නුඹලා ජයග්‍රහණය ලබන්නන්මය. එමෙන්ම අල්ලාහ් නුඹලා සමගය. තවද ඔහු නුඹලාගේ ක්‍රියාවන්(හි තිළිණය) නුඹලාට අඩු නොකරන්නේය.

إِنَّمَا الْحَيَاةُ الدُّنْيَا لَعِبٌ وَلَهْوٌ ۚ وَإِن تُؤْمِنُوا وَتَتَّقُوا يُؤْتِكُمْ أُجُورَكُمْ وَلَا يَسْأَلْكُمْ أَمْوَالَكُمْ ﴿٣٧﴾

37. මෙලොව ජීවිතය කෙළි සෙල්ලමක් සහ විනෝදයක් මිස නැත. තවද නුඹලා විශ්වාස කොට බියබැතිමත් වන්නේ නම්, ඔහු නුඹලාට නුඹලාගේ තිළිණ ලබා දෙන්නේය. එමෙන්ම ඔහු නුඹලාගේ වස්තූන් නුඹලාගෙන් නොඉල්ලන්නේය.

إِن يَسْأَلْكُمُوهَا فَيُحْفِكُمْ تَبْخَلُوا وَيُخْرِجْ أَضْغَانَكُمْ ﴿٣٨﴾

38. ඔහු ඒවා නුඹලාගෙන් ඉල්ලා නුඹලාට බලකරන්නේ නම්, නුඹලා මසුරු වන්නෙහුය. තවද ඔහු නුඹලාගේ ද්වේෂය හෙළි කරන්නේය.

هَا أَنتُمْ هَٰؤُلَاءِ تُدْعَوْنَ لِتُنفِقُوا فِي سَبِيلِ اللَّهِ فَمِنكُم مَّن يَبْخَلُ ۖ وَمَن يَبْخَلْ فَإِنَّمَا يَبْخَلُ عَن نَّفْسِهِ ۚ وَاللَّهُ الْغَنِيُّ وَأَنتُمُ الْفُقَرَاءُ ۚ وَإِن تَتَوَلَّوْا يَسْتَبْدِلْ قَوْمًا غَيْرَكُمْ ثُمَّ لَا يَكُونُوا أَمْثَالَكُمْ ﴿٣٩﴾

39. බලනු! අල්ලාහ්ගේ මාර්ගයෙහි වියදම් කිරීම සඳහා කැඳවනු ලැබූවන් නුඹලාමය. නමුත් නුඹලාගෙන් සමහරු මසුරුය. තවද කවුරුන් හෝ මසුරු වන්නේද, ඔහු තමන්ටම මසුරුකම් කරන්නේය. අල්ලාහ් ස්වයංපෝෂිතය, නුඹලා දිළින්දන්ය. තවද නුඹලා පිටුපාන්නේ නම්, ඔහු නුඹලා වෙනුවට වෙනත් ජනතාවක් ගෙන එන්නේය. පසුව ඔවුන් නුඹලා මෙන් නොවන්නෝය.



## අල් ෆත්හ්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِنَّا فَتَحۡنَا لَكَ فَتۡحًا مُّبِيۡنًا ۝٢

2. ඇත්තෙන්ම අපි ඔබට පැහැදිලි ජයග්‍රහණයක් පිරිනැමුවෙමු.

لِّيَغۡفِرَ لَكَ اللّٰهُ مَا تَقَدَّمَ مِنۡ ذَنۡۢبِكَ وَمَا تَاَخَّرَ وَيُتِمَّ نِعۡمَتَهٗ عَلَيۡكَ وَيَهۡدِيَكَ صِرَاطًا مُّسۡتَقِيۡمًا ۝٣

*3. එය අල්ලාහ් ඔබට ඔබගේ අතීත සහ අනාගත අඩුලුහුඬුකම් වසා දමනු පිණිසද, ඔහු ඔබට ඔහුගේ අනුග්‍රහය පරිපූර්ණ කරනු පිණිසද, ඔබව ඍජු මාර්ගයෙහි යොමු කරනු පිණිසද වේ.

وَّيَنۡصُرَكَ اللّٰهُ نَصۡرًا عَزِيۡزًا ۝٤

4. තවද එය අල්ලාහ් බලවත් උදව්වකින් ඔබට උදව් කරනු පිණිසද වේ.

هُوَ الَّذِىۡۤ اَنۡزَلَ السَّكِيۡنَةَ فِىۡ قُلُوۡبِ الۡمُؤۡمِنِيۡنَ لِيَزۡدَادُوۡۤا اِيۡمَانًا مَّعَ اِيۡمَانِهِمۡ‌ؕ وَلِلّٰهِ جُنُوۡدُ السَّمٰوٰتِ وَالۡاَرۡضِ‌ؕ وَكَانَ اللّٰهُ عَلِيۡمًا حَكِيۡمًا ۝٥

5. විශ්වාසිතයින්ගේ හදවත්හි, ඔවුන්ගේ විශ්වාසයෙහි තවතවත් විශ්වාසය ඇති වනු පිණිස ශාන්තිය පහළ කළේ ඔහුමය. තවද අහස් සහ පොළොවේ සේනාවන් අල්ලාහ්ටම අයත්ය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

لِّيُدۡخِلَ الۡمُؤۡمِنِيۡنَ وَالۡمُؤۡمِنٰتِ جَنّٰتٍ تَجۡرِىۡ مِنۡ تَحۡتِهَا الۡاَنۡهٰرُ خٰلِدِيۡنَ فِيۡهَا وَيُكَفِّرَ عَنۡهُمۡ سَيِّاٰتِهِمۡ‌ؕ وَكَانَ ذٰلِكَ

6. එය ඔහු විශ්වාසිත පුරුෂයින් සහ විශ්වාසිත ස්ත්‍රීන්ව පහළින් ගලාබස්නා ගංගාවලින් යුත් උද්‍යානයන්හි ඔවුන් සදාකල් වෙසෙන්නන් ලෙස ඇතුළු කරවීම පිණිසද, එමෙන්ම ඔහු ඔවුන්ගේ නපුරුකම් ඔවුන්ගෙන් ඉවත් කරනු

*සටහන. 3: මෙම වැකියෙන් ශුද්ධවූ වක්තෘවරයාණන් (ඔහුට සාමය අත්වේවා) වෙත 'zසන්බුන්' යන වචනය භුවා දක්වා ඇත. අතීතයේ සිදුවූ පාපයන්ටද අනාගතයේ සිදුවන පාපයන්ටද ක්ෂමාව දීමක් මෙයින් අර්ථවත් නොවේ. මෙහි අර්ථය වනුයේ ශුද්ධවූ වක්තෘවරයාණන්ගේ (ඔහුට සාමය අත්වේවා) නබිත්වයට පෙර ජීවිතය පවින් තොර වූ බව ලොව සාක්ෂි දැරූ ආකාරයටම ඉදිරි කාලයේදීත් එතුමාගේ ජීවිතය පරිශුද්ධ යැයි තහවුරු කර දෙන බවට දෙවියන්ගේ පොරොන්දුව යන්නය.

عِنْدَ اللّٰهِ فَوْزًا عَظِيْمًا ۙ﴿٦﴾

පිණිසද වේ. තවද අල්ලාහ් අභියස අතිමහත් වූ ජයග්‍රහණය එය වේ.

وَّ يُعَذِّبَ الْمُنٰفِقِيْنَ وَالْمُنٰفِقٰتِ وَالْمُشْرِكِيْنَ وَالْمُشْرِكٰتِ الظَّآنِّيْنَ بِاللّٰهِ ظَنَّ السَّوْءِ ؕ عَلَيْهِمْ دَآئِرَةُ السَّوْءِ ۚ وَغَضِبَ اللّٰهُ عَلَيْهِمْ وَلَعَنَهُمْ وَاَعَدَّ لَهُمْ جَهَنَّمَ ؕ وَسَآءَتْ مَصِيْرًا ﴿٧﴾

7. එමෙන්ම (එය) ඔහු කුහක පුරුෂයන්ටද කුහක ස්ත්‍රීන්ටද අල්ලාහ් පිළිබඳව නපුරු සිතුවිල්ලෙහි සිටින්නන් වන ප්‍රතිමා පුදන පුරුෂයන්ටද ප්‍රතිමා පුදන ස්ත්‍රීන්ටද දඬුවම් කරනු පිණිස වේ. මහත් උවදුරු ඔවුන් මත වේ. තවද අල්ලාහ්ගේ කෝපය ඔවුන් මත වේ. තවද ඔහු ඔවුනට ශාප කර ඇත්තේය. තවද ඔහු ඔවුනට නිරය පිළියෙල කර ඇත්තේය. ඇත්තෙන්ම එය නපුරු නවාතැනකි.

وَلِلّٰهِ جُنُوْدُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ وَكَانَ اللّٰهُ عَزِيْزًا حَكِيْمًا ﴿٨﴾

8. තවද අහස් සහ පොළොවේ සේනාවන් අල්ලාහ්ට අයත්ය. තවද අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

اِنَّاۤ اَرْسَلْنٰكَ شَاهِدًا وَّ مُبَشِّرًا وَّنَذِيْرًا ۙ﴿٩﴾

9. නියතවශයෙන්ම අපි ඔබව සාක්ෂිකරුවෙකු ලෙසද ශුභාරංචි දෙන්නෙකු ලෙසද අවවාද කරන්නෙකු ලෙසද එවා ඇත්තෙමු.

لِّتُؤْمِنُوْا بِاللّٰهِ وَرَسُوْلِهٖ وَتُعَزِّرُوْهُ وَتُوَقِّرُوْهُ ؕ وَتُسَبِّحُوْهُ بُكْرَةً وَّاَصِيْلًا ﴿١٠﴾

10. එය නුඹලා අල්ලාහ් මෙන්ම ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කරනු පිණිසද ඔහුට උදව් කරනු පිණිසද ඔහුට ගෞරව දක්වනු පිණිසද එමෙන්ම නුඹලා උදය සහ සවස ඔහුව සුවිශුද්ධ කරනු පිණිසද වේ.

اِنَّ الَّذِيْنَ يُبَايِعُوْنَكَ اِنَّمَا يُبَايِعُوْنَ اللّٰهَ ؕ يَدُ اللّٰهِ فَوْقَ اَيْدِيْهِمْ ۚ فَمَنْ نَّكَثَ فَاِنَّمَا يَنْكُثُ عَلٰى نَفْسِهٖ ۚ وَمَنْ اَوْفٰى بِمَا عٰهَدَ عَلَيْهُ اللّٰهَ فَسَيُؤْتِيْهِ اَجْرًا عَظِيْمًا ﴿١١﴾

11. සැබැවින්ම ඔබ වෙත බෛඅත් (ප්‍රතිඥා) කරගන්නන් ගත්කල ඔවුන් අල්ලාහ් වෙතම බෛඅත් (ප්‍රතිඥා) කරගන්නෝය. අල්ලාහ්ගේ අත ඔවුන්ගේ අත් මතය. එබැවින් කවුරුන් හෝ (තම) දිවුරුම කඩ කරන්නේද තමන්ගේ හානියටම එය කඩකරන්නේය. තවද කවුරුන් හෝ අල්ලාහ් සමග කර ඇති (තම) දිවුරුම ඉටු කරන්නේද නියතවශයෙන්ම ඔහු ඔහුට මහත් තිළිණයක් දෙන්නේය.

12. කාන්තාරවාසි අරාබිවරුන්ගෙන් පසුබට වූවන් ඔබ වෙත, 'අපගේ වත්කම්ද අපගේ පවුල්ද අපව කාර්යබහුල කර ඇත. එබැවින් අප වෙනුවෙන් ක්ෂමාව අයැදින්නැ'යි කියනු ඇත. නමුත් ඔවුන් තම හදවත්හි නොමැති දේ තම දිවෙන් පවසති. 'ඔහු නුඹලාට යම්කිසි හානියක් කිරීමට අදහස් කරන්නේ නම් හෝ ඔහු නුඹලාට යම්කිසි යහපතක් කිරීමට අදහස් කරන්නේ නම් හෝ අල්ලාහ්ට එරෙහිව නුඹලාට අල්පයක්වත් උපකාර කළ හැක්කේ කවරෙකුටද? එහෙත්, නුඹලා කරන දේ පිළිබඳව අල්ලාහ් ඉතා විමසිලිමත්යැ'යි පවසන්න.

سيقول لك المخلفون من الاعراب
شغلتنا اموالنا واهلونا فاستغفر لنا ۚ
يقولون بالسنتهم ما ليس في قلوبهم ۚ
قل فمن يملك لكم من الله شيئا
ان اراد بكم ضرا او اراد بكم نفعا ۚ
بل كان الله بما تعملون خبيرا ﴿١٢﴾

13. 'එහෙත්, දූතයාද විශ්වාසිතයින්ද තමන්ගේ පවුල් වෙතට කිසිවිටෙකත් ආපසු නොඑන්නේ යැයි නුඹලා අනුමාන කළෙහුය. තවද එය නුඹලාගේ හදවත්වලට අලංකාරව (පෙනෙන්නට) සලස්වන ලදි. තවද නුඹලා නපුරු සිතුවිල්ලෙහි සිටියෙහුය. තවද නුඹලා විනාශ වන්නාවූ ජනතාවක් වූවෙහුය'.

بل ظننتم ان لن ينقلب الرسول
والمؤمنون الى اهليهم ابدا وزين ذلك
في قلوبكم وظننتم ظن السوء ۚ
وكنتم قوما بورا ﴿١٣﴾

14. තවද අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස නොකරන අය ගත්කල නියත වශයෙන්ම අපි අවිශ්වාසිතයින්ට දැවෙන ගින්නක් පිළියෙළ කර ඇත්තෙමු.

ومن لم يؤمن بالله ورسوله فانا
اعتدنا للكافرين سعيرا ﴿١٤﴾

15. තවද අහස් හා පොළොවේ රාජධානිය අල්ලාහ්ටම අයත්ය. ඔහු අභිමත අයට ඔහු ක්ෂමාව දෙන්නේය. තවද ඔහු අභිමත අයට දඬුවම් දෙන්නේය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

ولله ملك السماوات والارض ۚ يغفر
لمن يشاء ويعذب من يشاء ۚ وكان الله
غفورا رحيما ﴿١٥﴾

16. නුඹලා යුද්ධයෙන් ලත් වස්තූන් වෙත එය ලබාගැනීමට පිටත් වූ කල්හි, 'අපි නුඹලා පසුපස එන්නෙමු'යි පසුබට වූවන් නිශ්චිතවම

سيقول المخلفون اذا انطلقتم الى
مغانم لتاخذوها ذرونا نتبعكم ۚ

يُرِيدُونَ أَن يُبَدِّلُوا كَلَامَ اللَّهِ ۚ قُل لَّن تَتَّبِعُونَا كَذَٰلِكُمْ قَالَ اللَّهُ مِن قَبْلُ ۖ فَسَيَقُولُونَ بَلْ تَحْسُدُونَنَا ۚ بَلْ كَانُوا لَا يَفْقَهُونَ إِلَّا قَلِيلًا ﴿١٦﴾

කියන්නෝය. ඔවුන් අල්ලාහ්ගේ නියමය වෙනස් කිරීමට තැත් කරන්නෝය. පවසන්න, 'නුඹලා අප පසු පස නොආයුතුය. මීට පෙරාතුවම අල්ලාහ් එලෙස පවසා ඇත්තේය'. එවිට ඔවුන්, 'නොඑසේය, නමුත් නුඹලා අපට ඊර්ෂ්‍යා කරන්නෙහුයැ'යි පවසන්නෝය. එසේ නොව, ඔවුන් වටහාගන්නේ ස්වල්පයක් මිස නැත.

قُل لِّلْمُخَلَّفِينَ مِنَ الْأَعْرَابِ سَتُدْعَوْنَ إِلَىٰ قَوْمٍ أُولِي بَأْسٍ شَدِيدٍ تُقَاتِلُونَهُمْ أَوْ يُسْلِمُونَ ۖ فَإِن تُطِيعُوا يُؤْتِكُمُ اللَّهُ أَجْرًا حَسَنًا ۖ وَإِن تَتَوَلَّوْا كَمَا تَوَلَّيْتُم مِّن قَبْلُ يُعَذِّبْكُمْ عَذَابًا أَلِيمًا ﴿١٧﴾

17. කාන්තාරවාසි අරාබිවරුන්ගෙන් පසුබටවූවන්ට (මෙසේ) පවසන්න. 'ශක්තිමත්ව සටන්වදින ජනතාවකට එරෙහිව (සටන් වැදීමට) නුඹලා කැඳවනු ලබන්නෙහුය. ඔවුන් යටහත් වන තුරු නුඹලා ඔවුන් සමග සටන් කළ යුතුය. එසේ නුඹලා අවනත වන්නේ නම් අල්ලාහ් නුඹලාට යහපත් තිළිණය දෙන්නේය. නමුත් නුඹලා පෙර පිටුපෑ ආකාරයටම පිටුපා යන්නේ නම්, ඔහු නුඹලාට ඉතා වේදනිය දඬුවමක් දෙන්නේය'.

لَّيْسَ عَلَى الْأَعْمَىٰ حَرَجٌ وَلَا عَلَى الْأَعْرَجِ حَرَجٌ وَلَا عَلَى الْمَرِيضِ حَرَجٌ ۗ وَمَن يُطِعِ اللَّهَ وَرَسُولَهُ يُدْخِلْهُ جَنَّاتٍ تَجْرِي مِن تَحْتِهَا الْأَنْهَارُ ۖ وَمَن يَتَوَلَّ يُعَذِّبْهُ عَذَابًا أَلِيمًا ﴿١٨﴾

18. (සටනට නොගිය) අන්ධයෙකු කෙරෙහි කිසිදු වරදක් නැත. තවද අබ්බාගාතයෙකු කෙරෙහි කිසිදු වරදක් නැත. තවද රෝගියෙකු කෙරෙහිද කිසිදු වරදක් නැත. තවද කවුරුන් හෝ අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට අවනත වන්නේද එවැන්නන්ව, පහළින් ගලා බස්නා ගංගාවලින් යුත් උද්‍යානයන්හි ඔහු ඇතුළුවීමට සලස්වන්නේය. තවද කවුරුන් හෝ පිටුපා යන්නේද ඔහුට ඉතා වේදනිය දඬුවමක් ඔහු දෙන්නේය.

لَّقَدْ رَضِيَ اللَّهُ عَنِ الْمُؤْمِنِينَ إِذْ يُبَايِعُونَكَ تَحْتَ الشَّجَرَةِ فَعَلِمَ مَا فِي قُلُوبِهِمْ فَأَنزَلَ السَّكِينَةَ عَلَيْهِمْ وَأَثَابَهُمْ فَتْحًا قَرِيبًا ﴿١٩﴾

19. ඔවුන් (විශ්වාසිතයින්) ගස පාමුල ඔබ වෙත බෛඅත් (ප්‍රතිඥා) දුන් කල්හි නියතවශයෙන්ම අල්ලාහ් විශ්වාසිතයින් ගැන තෘප්තිමත් විය. තවද ඔවුන්ගේ හදවත්හි ඇති දේ ඔහු දැන ගත්තේය. තවද ඔහු ඔවුන් මත ශාන්තිය පහළ කළේය. තවද ඔහු ඔවුනට සමීපතම ජයග්‍රහණයක් තිළිණ කළේය.

وَّمَغَانِمَ كَثِيرَةً يَّأْخُذُونَهَا ۗ وَكَانَ اللَّهُ عَزِيزًا حَكِيمًا ٢٠

20. එමෙන්ම යුද්ධයෙන් ලත් බොහෝ වස්තූන්ද (පිරිනැමුවේය). ඔවුන් එය අත්පත් කර ගන්නෝය. තවද අල්ලාහ් බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

وَعَدَكُمُ اللَّهُ مَغَانِمَ كَثِيرَةً تَأْخُذُونَهَا فَعَجَّلَ لَكُمْ هَٰذِهِ وَكَفَّ أَيْدِيَ النَّاسِ عَنكُمْ وَلِتَكُونَ آيَةً لِّلْمُؤْمِنِينَ وَيَهْدِيَكُمْ صِرَاطًا مُّسْتَقِيمًا ٢١

21. යුද්ධයෙන් අත්වන බොහෝ වස්තූන් පිළිබඳව අල්ලාහ් නුඹලාට පොරොන්දු විය. එමනිසා ඔහු මෙය නුඹලාට පෙරාතුවම ලබා දුන්නේය. තවද ඔහු මිනිසුන්ගේ අත් නුඹලා වෙනුවෙන් වැළැක්වූයේය. එය විශ්වාසිතයින්ට සළකුණක් වනු පිණිසද ඔහු නුඹලාව ඍජු මාර්ගයට යොමු කරනු පිණිසද වේ.

وَّأُخْرَىٰ لَمْ تَقْدِرُوا عَلَيْهَا قَدْ أَحَاطَ اللَّهُ بِهَا ۚ وَكَانَ اللَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرًا ٢٢

22. තවද තවමත් නුඹලාට ලැබී නැති අනෙකුත් (ජයග්‍රහණයන් ද ඔහු නුඹලාට පොරොන්දු වී ඇත). නියතවශයෙන්ම අල්ලාහ් එය වටලාගෙන ඇත්තේය. තවද අල්ලාහ්ට සියළු දේ කෙරෙහි බලය ඇත.

وَلَوْ قَاتَلَكُمُ الَّذِينَ كَفَرُوا لَوَلَّوُا الْأَدْبَارَ ثُمَّ لَا يَجِدُونَ وَلِيًّا وَّلَا نَصِيرًا ٢٣

23. තවද අවිශ්වාස කළවුන් නුඹලා සමග සටන් වදින්නේ නම් නිශ්චිතවම ඔවුන් පිටුපා යන්නෝමය. පසුව ඔවුන් කිසිදු ආරක්ෂකයෙකු හෝ කිසිදු උදව්කරුවෙකු නොලබන්නෝය.

سُنَّةَ اللَّهِ الَّتِي قَدْ خَلَتْ مِن قَبْلُ ۖ وَلَن تَجِدَ لِسُنَّةِ اللَّهِ تَبْدِيلًا ٢٤

24. පෙර සිටම ක්‍රියාත්මක වූ අල්ලාහ්ගේ පිළිවෙත මෙයම විය. තවද අල්ලාහ්ගේ පිළිවෙතහි ඔබ කිසිවිටෙකත් කිසිදු වෙනසක් නොදකින්නෙහිය.

وَهُوَ الَّذِي كَفَّ أَيْدِيَهُمْ عَنكُمْ وَأَيْدِيَكُمْ عَنْهُم بِبَطْنِ مَكَّةَ مِن بَعْدِ أَنْ أَظْفَرَكُمْ عَلَيْهِمْ ۚ وَكَانَ اللَّهُ بِمَا تَعْمَلُونَ بَصِيرًا ٢٥

25. ඔහු නුඹලාට ඔවුන් මත ජයග්‍රහණය ලබාදුන් පසුව, මක්කා මිටියාවතෙහි ඔවුන්ගේ අත් නුඹලා වෙනුවෙන්ද නුඹලාගේ අත් ඔවුන් වෙනුවෙන්ද වැළැක්වූයේ ඔහුය. තවද නුඹලා කරන සියළු දේ අල්ලාහ් දකින්නේය.

هُمُ الَّذِيْنَ كَفَرُوْا وَصَدُّوْكُمْ عَنِ الْمَسْجِدِ الْحَرَامِ وَالْهَدْيَ مَعْكُوْفًا اَنْ يَّبْلُغَ مَحِلَّهٗ ۭ وَلَوْلَا رِجَالٌ مُّؤْمِنُوْنَ وَنِسَاۗءٌ مُّؤْمِنٰتٌ لَّمْ تَعْلَمُوْهُمْ اَنْ تَطَـُٔــوْهُمْ فَتُصِيْبَكُمْ مِّنْهُمْ مَّعَرَّةٌۢ بِغَيْرِ عِلْمٍ ۚ لِيُدْخِلَ اللّٰهُ فِيْ رَحْمَتِهٖ مَنْ يَّشَاۗءُ ۚ لَوْ تَزَيَّلُوْا لَعَذَّبْنَا الَّذِيْنَ كَفَرُوْا مِنْهُمْ عَذَابًا اَلِيْمًا ﴿٢٦﴾

26. අවිශ්වාස කළේද ශුද්ධ වූ නැමදුම් ස්ථානයෙන් නුඹලාව සහ නුඹලා සත්ව පරිත්‍යාගය සඳහා නියම කළා වූ සතුන්ව එම ස්ථානය කරා ළඟාවීමෙන් වැළැක්වූයේද ඔවුන්මය. තවද ඇතැම් විශ්වාසිත පුරුෂයින්ද ඇතැම් විශ්වාසිත ස්ත්‍රීන්ද (මක්කාවෙහි) නොසිටින්නට (නුඹලාට සටන් වැදීමට අවසර දෙන්නට තිබුණි). මන්දයත් නුඹලා ඔවුන්ව නාඳුනන බැවිනි. නුඹලා නොදැනුවත්ව ඔවුන්ව පාගා දැමූවායින් පසුව නුඹලාට ඔවුන්ගෙන් කැළලක් අත්වන්නට තිබුණි. නමුත් අල්ලාහ් තම අභිමත අයව තම දයාවට ඇතුළු කරනු පිණිස (ඔහු එය වැළැක්වූයේය). ඔවුහු (අවිශ්වාසිතයින්ගෙන්) වෙන්ව සිටියහොත් නියතවශයෙන්ම ඔවුන්ගෙන් අවිශ්වාස කළ අයහට ඉතා වේදනීය දඬුවමක් අපට දෙන්නට තිබුණි.

اِذْ جَعَلَ الَّذِيْنَ كَفَرُوْا فِيْ قُلُوْبِهِمُ الْحَمِيَّةَ حَمِيَّةَ الْجَاهِلِيَّةِ فَاَنْزَلَ اللّٰهُ سَكِيْنَتَهٗ عَلٰي رَسُوْلِهٖ وَعَلَي الْمُؤْمِنِيْنَ وَاَلْزَمَهُمْ كَلِمَةَ التَّقْوٰى وَكَانُوْٓا اَحَقَّ بِهَا وَاَهْلَهَا ۭ وَكَانَ اللّٰهُ بِكُلِّ شَيْءٍ عَلِيْمًا ﴿٢٧﴾

27. අවිශ්වාස කළ අය තමන්ගේ හදවත්හි අඥාන (කාල) මානයෙන් උදම්වී කෝපාවිෂ්ඨව සිටිය කල්හි, අල්ලාහ් ඔහුගේ ශාන්තිය ඔහුගේ දූතයාණන් කෙරෙහිද විශ්වාසිතයින් කෙරෙහිද පහළ කළේය. තවද ඔවුන්ව බියබැතිමත් වදනට බැඳී සිටීමට සැලැස්වූවේය. තවද එයට ඉතා සුදුස්සන් මෙන්ම වඩා උරුම වූවන් ඔවුන්මය. තවද අල්ලාහ් සියල්ල මැනැවින් දන්නේය.

لَقَدْ صَدَقَ اللّٰهُ رَسُوْلَهُ الرُّءْيَا بِالْحَقِّ ۚ لَتَدْخُلُنَّ الْمَسْجِدَ الْحَرَامَ اِنْ شَاۗءَ اللّٰهُ اٰمِنِيْنَ ۙ مُحَلِّقِيْنَ رُءُوْسَكُمْ وَمُقَصِّرِيْنَ ۙ لَا تَخَافُوْنَ ۭ فَعَلِمَ مَا

28. නියතවශයෙන්ම අල්ලාහ් තම දූතයාණන් (දුටු) සිහිනය සත්‍යය සමග ඉටු කළේය. අල්ලාහ් අභිමත වූයේ නම්, නුඹලා නුඹලාගේ හිස් මුඩු කරන ලදුවද හිසකෙස් කොටට කපන ලදුවද නුඹලා නොබියව පරිශුද්ධ වූ නැමදුම් ස්ථානයට සාමයෙන් යුතුව නිශ්චිතවම ඇතුළු වන්නෙහුය. නමුත් නුඹලා නොදත් දේ ඔහු දැන

لَمْ تَعْلَمُوْا فَجَعَلَ مِنْ دُوْنِ ذٰلِكَ فَتْحًا قَرِيْبًا ﴿٢٨﴾

සිටියේය. ඇත්තෙන්ම ඔහු මේ හැර තවත් සමීපතම ජයග්‍රහණයක් නුඹලාට නියම කළේය.

هُوَ الَّذِيْٓ اَرْسَلَ رَسُوْلَهٗ بِالْهُدٰى وَدِيْنِ الْحَقِّ لِيُظْهِرَهٗ عَلَى الدِّيْنِ كُلِّهٖ ؕ وَكَفٰى بِاللّٰهِ شَهِيْدًا ﴿٢٩﴾

29. මග පෙන්වීම සහ සත්‍ය ආගම සමග තම දූතයාණන්ව යැව්වේ ඔහුමය. එය සෙසු සෑම ආගමකටම වඩා අභිබවා යනු පිණිසය. තවද අල්ලාහ් සාක්ෂිකරුවෙක් වශයෙන් ප්‍රමාණවත්ය.

مُحَمَّدٌ رَّسُوْلُ اللّٰهِ ؕ وَالَّذِيْنَ مَعَهٗٓ اَشِدَّآءُ عَلَى الْكُفَّارِ رُحَمَآءُ بَيْنَهُمْ تَرٰىهُمْ رُكَّعًا سُجَّدًا يَّبْتَغُوْنَ فَضْلًا مِّنَ اللّٰهِ وَرِضْوَانًا ؗ سِيْمَاهُمْ فِيْ وُجُوْهِهِمْ مِّنْ اَثَرِ السُّجُوْدِ ؕ ذٰلِكَ مَثَلُهُمْ فِي التَّوْرٰىةِ ۛ وَمَثَلُهُمْ فِي الْاِنْجِيْلِ ۛ كَزَرْعٍ اَخْرَجَ شَطْـَٔهٗ فَاٰزَرَهٗ فَاسْتَغْلَظَ فَاسْتَوٰى عَلٰى سُوْقِهٖ يُعْجِبُ الزُّرَّاعَ لِيَغِيْظَ بِهِمُ الْكُفَّارَ ؕ وَعَدَ اللّٰهُ الَّذِيْنَ اٰمَنُوْا وَعَمِلُوا الصّٰلِحٰتِ مِنْهُمْ مَّغْفِرَةً وَّاَجْرًا عَظِيْمًا ﴿٣٠﴾

30. මුහම්මද් අල්ලාහ්ගේ දූතයාණන්ය. තවද ඔහු සමග සිටින අය අවිශ්වාසිතයින්ට එරෙහිව ඉතා දැඩිය. තවද ඔවුන් තමන් අතර ඉතා සෞම්‍යය. ඔවුන් අල්ලාහ්ගේ වරප්‍රසාදයද ඔහුගේ සොම්නසද පතා නමස්කාරයෙහි හිස පහළට නමමින්ද නමස්කාරයෙහි නළල බිම තබමින්ද සිටිනු ඔබ ඔවුන්ව දකින්නෙහිය. ඔවුන්ගේ විශිෂ්ඨත්වයේ ලකුණ ඔවුන්ගේ මුහුණෙහි ඇති අවනතභාවයේ සළකුණයි. මෙය ඔවුන් පිළිබඳව තව්රාත්හි ඇති උපමාවකි. එමෙන්ම ඉන්ජීල්හි ඔවුන්ගේ උපමාව දළු හටගන්වා ශක්තිමත් කරන (සාරවත්) බීජයක් බඳුය. පසුව එය තර වේ. පසුව එය තම කඳ මත ඝනව වැඩෙයි. එය වපුරන්නන්ව කුල්මත් කරයි. එය (දකින) අවිශ්වාසිතයින්ව කුපිත කරවනු පිණිස (ඔහු) එසේ කරයි. විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නන් හට ක්ෂමාවද අති මහත් වූ තිළිණයද අල්ලාහ් පොරොන්දු වී ඇත්තේය.



අල් හුජුරාත්
(මදිනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا لَا تُقَدِّمُوۡا بَيۡنَ يَدَىِ اللّٰهِ وَرَسُوۡلِهٖ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ سَمِيۡعٌ عَلِيۡمٌ ②

2. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් ඉදිරියෙහි අභිබවා නොයනු. නමුත් අල්ලාහ්ට බියබැතිමත් වනු. සැබැවින්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දත්තාය.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا لَا تَرۡفَعُوۡۤا اَصۡوَاتَكُمۡ فَوۡقَ صَوۡتِ النَّبِىِّ وَلَا تَجۡهَرُوۡا لَهٗ بِالۡقَوۡلِ كَجَهۡرِ بَعۡضِكُمۡ لِبَعۡضٍ اَنۡ تَحۡبَطَ اَعۡمَالُكُمۡ وَاَنۡتُمۡ لَا تَشۡعُرُوۡنَ ③

3. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේ හඬ වක්තෘවරයාගේ හඬට වඩා උස් නොකරනු. තවද නුඹලා එකිනෙකාට උස් හඬින් කතා කරන්නාක් මෙන් ඔහු ඉදිරියෙහි උස් හඬින් කතා නොකරනු. මන්ද නුඹලා නොදැන නුඹලාගේ ක්‍රියාවන් නිෂ්ඵල විය හැක.

اِنَّ الَّذِيۡنَ يَغُضُّوۡنَ اَصۡوَاتَهُمۡ عِنۡدَ رَسُوۡلِ اللّٰهِ اُولٰٓـئِكَ الَّذِيۡنَ امۡتَحَنَ اللّٰهُ قُلُوۡبَهُمۡ لِلتَّقۡوٰى ؕ لَهُمۡ مَّغۡفِرَةٌ وَّاَجۡرٌ عَظِيۡمٌ ④

4. සැබැවින්ම අල්ලාහ්ගේ දූතයාණන් ඉදිරියෙහි තම හඬ පහත් කරන අය ගත්කල, අල්ලාහ් ඔවුන්ගේ හදවත් බියබැතිමත්කම සඳහා පිරික්සා ඇත්තේය. ඔවුන් හට සමාවද අති මහත් වූ තිළිණද වේ.

اِنَّ الَّذِيۡنَ يُنَادُوۡنَكَ مِنۡ وَّرَآءِ الۡحُجُرٰتِ اَكۡثَرُهُمۡ لَا يَعۡقِلُوۡنَ ⑤

5. නියතවශයෙන්ම (ඔබගේ) නිවෙස්වලින් ඉතා බැහැර සිට ඔබට හඬනංවා අමතන අය ගත්කල ඔවුන්ගෙන් බොහෝ අය තේරුම් නොගන්නෝය.

وَلَوۡ اَنَّهُمۡ صَبَرُوۡا حَتّٰى تَخۡرُجَ اِلَيۡهِمۡ لَكَانَ خَيۡرًا لَّهُمۡ ؕ وَاللّٰهُ غَفُوۡرٌ رَّحِيۡمٌ ⑥

6. තවද ඔබ ඔවුන් වෙතට පිටත්ව එනතෙක් ඔවුන් ඉවසීමෙන් සිටියේ නම්, එය ඔවුන්ට වඩාත් යහපත් වන්නට තිබුණි. නමුත් අල්ලාහ් අතිශයින් සමාවන්විතය, පරම දයාබරය.

7. එම්බල විශ්වාසිතයිනි! අදමිටුවෙක් නුඹලා වෙත පුවතක් ගෙන ආවේ නම්, (එම පුවතේ සුලමුල) මුළුමනින්ම සොයා බලනු. එසේ නොවන්නට අඥානව නුඹලා යම් ජනතාවකට හානියක් කිරීමට පුළුවන. පසුව නුඹලා කළ දේ හේතුවෙන් නුඹලා පසුතැවිලි වන්නෙහුය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوٓا۟ إِن جَآءَكُمْ فَاسِقٌۢ بِنَبَإٍ فَتَبَيَّنُوٓا۟ أَن تُصِيبُوا۟ قَوْمًۢا بِجَهَٰلَةٍ فَتُصْبِحُوا۟ عَلَىٰ مَا فَعَلْتُمْ نَٰدِمِينَ ٧

8. තවද නුඹලා අතර අල්ලාහ්ගේ දූතයාණන් සිටින බව දැනගනු. බොහෝ කටයුතු වලදී ඔහු නුඹලාගේ කැමැත්තට එකඟ වූවා නම් නියතවශයෙන්ම නුඹලා කරදරයට පත්වන්නට තිබුණි. නමුත් අල්ලාහ්, විශ්වාසය නුඹලාට ප්‍රිය වීමටත් නුඹලාගේ හදවත්වලට එය අලංකාර වීමටත් සැලැස්වූවේය. එමෙන්ම ඔහු අවිශ්වාසය, නපුරුකම, සහ අකීකරුභාවය නුඹලාට පිළිකුල් කරවිය. මෙවැන්නන්ම නිවැරදි මාර්ගය අනුගමනය කරන්නන්ය.

وَٱعْلَمُوٓا۟ أَنَّ فِيكُمْ رَسُولَ ٱللَّهِ ۚ لَوْ يُطِيعُكُمْ فِى كَثِيرٍ مِّنَ ٱلْأَمْرِ لَعَنِتُّمْ وَلَٰكِنَّ ٱللَّهَ حَبَّبَ إِلَيْكُمُ ٱلْإِيمَٰنَ وَزَيَّنَهُۥ فِى قُلُوبِكُمْ وَكَرَّهَ إِلَيْكُمُ ٱلْكُفْرَ وَٱلْفُسُوقَ وَٱلْعِصْيَانَ ۚ أُو۟لَٰٓئِكَ هُمُ ٱلرَّٰشِدُونَ ٨

9. මෙය අල්ලාහ්ගෙන් වූ වරප්‍රසාදයක් සහ අනුග්‍රහයක්ය. තවද අල්ලාහ් සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

فَضْلًا مِّنَ ٱللَّهِ وَنِعْمَةً ۚ وَٱللَّهُ عَلِيمٌ حَكِيمٌ ٩

10. තවද විශ්වාසිතයින්ගෙන් දෙපිරිසක් (ඔවුනතර) සටන් කළේ නම්, ඔවුනතර සමාදානය ඇති කරනු. (එයට පසුව) ඔවුන් දෙපිරිසෙන් එක් පිරිසක් අනෙක් පිරිසට එරෙහිව සීමාව ඉක්මවන්නේ නම්, සීමාව ඉක්මවන පිරිස අල්ලාහ්ගේ නියෝගය වෙත ආපසු එනතුරු ඔවුන් සමග සටන් කරනු. පසුව ඔවුන් ආපසු පැමිණියේ නම් ඔවුන් දෙදෙනා අතර යුක්තිසහගතව සමාදානය ඇති කරනු. එමෙන්ම යුක්තියෙන් ක්‍රියා කරනු. නියතවශයෙන්ම අල්ලාහ් යුක්තිය ඉටුකරන්නන්ව ප්‍රිය කරන්නේය.

وَإِن طَآئِفَتَانِ مِنَ ٱلْمُؤْمِنِينَ ٱقْتَتَلُوا۟ فَأَصْلِحُوا۟ بَيْنَهُمَا ۖ فَإِنۢ بَغَتْ إِحْدَىٰهُمَا عَلَى ٱلْأُخْرَىٰ فَقَٰتِلُوا۟ ٱلَّتِى تَبْغِى حَتَّىٰ تَفِىٓءَ إِلَىٰٓ أَمْرِ ٱللَّهِ ۚ فَإِن فَآءَتْ فَأَصْلِحُوا۟ بَيْنَهُمَا بِٱلْعَدْلِ وَأَقْسِطُوٓا۟ ۖ إِنَّ ٱللَّهَ يُحِبُّ ٱلْمُقْسِطِينَ ١٠

11. නියතවශයෙන්ම (සියළු) විශ්වාසිතයින් සහෝදරයින්ය.

إِنَّمَا ٱلْمُؤْمِنُونَ إِخْوَةٌ فَأَصْلِحُوا۟

බَيْنَ اَخَوَيْكُمْ وَاتَّقُوا اللّٰهَ لَعَلَّكُمْ تُرْحَمُوْنَ ﴿١١﴾

එබැවින් නුඹලාගේ සොහොයුරන් දෙදෙනා අතර සමාදානය ඇති කරනු. තවද නුඹලාට කරුණාව දක්වනු ලබනු පිණිස අල්ලාහ්ට බියබැතිමත් වනු.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا يَسْخَرْ قَوْمٌ مِّنْ قَوْمٍ عَسٰۤى اَنْ يَّكُوْنُوْا خَيْرًا مِّنْهُمْ وَلَا نِسَآءٌ مِّنْ نِّسَآءٍ عَسٰۤى اَنْ يَّكُنَّ خَيْرًا مِّنْهُنَّ ۚ وَلَا تَلْمِزُوْۤا اَنْفُسَكُمْ وَلَا تَنَابَزُوْا بِالْاَلْقَابِ ؕ بِئْسَ الِاسْمُ الْفُسُوْقُ بَعْدَ الْاِيْمَانِ ۚ وَمَنْ لَّمْ يَتُبْ فَاُولٰٓئِكَ هُمُ الظّٰلِمُوْنَ ﴿١٢﴾

12. එම්බල විශ්වාසිතයිනි! නුඹලා එක් පිරිසක් තවත් පිරිසකට සරදම් නොකළ යුතුය. ඔවුන් මොවුන්ට වඩා විශිෂ්ඨ වන්නට පුළුවන. එමෙන්ම ස්ත්‍රීන් (පිරිසක්) තවත් ස්ත්‍රීන් (පිරිසක)ට සරදම් නොකළ යුතුය. ඔවුන් මොවුන්ට වඩා විශිෂ්ඨ වන්නට පුළුවන. එමෙන්ම නුඹලා නුඹලාගේ ජනතාව අපහාස නොකරනු. එමෙන්ම උපහාසාත්මක නම්වලින් එකානෙකාව නොඅමතනු. විශ්වාසයෙන් පසු දුෂ්ඨ නාමය අත්කර ගැනීම ඉතා නරකය. තවද යමෙක් පසුතැවිලි නොවන්නේද වරදකරුවන් වන්නේ ඔවුන්මය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اجْتَنِبُوْا كَثِيْرًا مِّنَ الظَّنِّ ۫ اِنَّ بَعْضَ الظَّنِّ اِثْمٌ وَّلَا تَجَسَّسُوْا وَلَا يَغْتَبْ بَّعْضُكُمْ بَعْضًا ؕ اَيُحِبُّ اَحَدُكُمْ اَنْ يَّاْكُلَ لَحْمَ اَخِيْهِ مَيْتًا فَكَرِهْتُمُوْهُ ؕ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ تَوَّابٌ رَّحِيْمٌ ﴿١٣﴾

13. එම්බල විශ්වාසිතයිනි! සැක කිරීමෙන් අධිකව වැළකී සිටිනු. නියතවශයෙන්ම ඇතැම් සැකයන් පාපයකි. තවද (අනුන්ගේ) වැරදි නොසොයනු. එමෙන්ම නුඹලා එකිනෙකාගේ නුගුණ (ඔවුන්) නැති තැන නොකියනු. නුඹලාගෙන් කෙනෙකු තම මළ සහෝදරයකුගේ මාංශ අනුභව කිරීමට කැමැති වන්නේද? නිශ්චිතවම නුඹලා එය පිළිකුල් කරන්නෙහුය. තවද අල්ලාහ්ට බියබැතිමත් වනු. නියතවශයෙන්ම අල්ලාහ් (කරුණාවෙන් යුතුව) පශ්චාත්තාප භාරගන්නාය, පරම දයාබරය.

يٰۤاَيُّهَا النَّاسُ اِنَّا خَلَقْنٰكُمْ مِّنْ ذَكَرٍ وَّاُنْثٰى وَجَعَلْنٰكُمْ شُعُوْبًا وَّقَبَآئِلَ لِتَعَارَفُوْا ؕ اِنَّ اَكْرَمَكُمْ عِنْدَ اللّٰهِ

14. එම්බල මිනිසුනි! නියතවශයෙන්ම අපි නුඹලාව පුරුෂ සහ ස්ත්‍රියගෙන් මවා ඇත්තෙමු. නුඹලා එකිනෙකා හඳුනාගනු පිණිස අපි නුඹලාව ජාතීන් වශයෙන්ද ගෝත්‍රයන් වශයෙන්ද ඇති කළෙමු. නිශ්චිතවම අල්ලාහ්

اَتْقٰىكُمْ ؕ اِنَّ اللّٰهَ عَلِيْمٌ خَبِيْرٌ ﴿١٤﴾

අභියස නුඹලාගෙන් ඉතාමත් ගෞරවාන්විත වන්නේ නුඹලා අතර ඉතාමත් බියබැතිමතාය. නියත වශයෙන්ම අල්ලාහ් සියල්ල දත්තාය, ඉතා විමසිලිමත්ය.

قَالَتِ الْاَعْرَابُ اٰمَنَّا ؕ قُلْ لَّمْ تُؤْمِنُوْا
وَلٰكِنْ قُوْلُوْۤا اَسْلَمْنَا وَلَمَّا يَدْخُلِ
الْاِيْمَانُ فِيْ قُلُوْبِكُمْ ؕ وَاِنْ تُطِيْعُوا اللّٰهَ
وَرَسُوْلَهٗ لَا يَلِتْكُمْ مِّنْ اَعْمَالِكُمْ شَيْـًٔا ؕ
اِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِيْمٌ ﴿١٥﴾

15. කාන්තාර වාසි අරාබිවරුන්, 'අපි විශ්වාස කළෙමු'යි කියති. පවසන්න, “නුඹලා (තවමත්) විශ්වාස නොකළෙහුය. නමුත් 'අපි මුස්ලිම් වූවෙමු'යි කියනු. නමුත් (සැබෑ) විශ්වාසය නුඹලාගේ හදවත්හි තවමත් ඇතුළු වී නොමැත”. නමුත් නුඹලා අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට අවනත වූයේ නම්, නුඹලාගේ ක්‍රියාවෙන් කිසිවක් ඔහු නුඹලාට අඩු නොකරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

اِنَّمَا الْمُؤْمِنُوْنَ الَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ
وَرَسُوْلِهٖ ثُمَّ لَمْ يَرْتَابُوْا وَجٰهَدُوْا
بِاَمْوَالِهِمْ وَاَنْفُسِهِمْ فِيْ سَبِيْلِ اللّٰهِ ؕ
اُولٰٓئِكَ هُمُ الصّٰدِقُوْنَ ﴿١٦﴾

16. නියතවශයෙන්ම විශ්වාසිතයින් වන්නේ, අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් කෙරෙහි (සැබෑ ලෙස) විශ්වාස කොට, පසුව සැක නොකොට අල්ලාහ්ගේ මාර්ගයෙහි තමන්ගේ වස්තූන් සහ තමන්ගේ ජීවිතවලින් පරිශ්‍රමයෙහි යෙදෙන්නන්ය. මොවුන්ම සත්‍යවාදීන්ය.

قُلْ اَتُعَلِّمُوْنَ اللّٰهَ بِدِيْنِكُمْ ؕ وَاللّٰهُ يَعْلَمُ
مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْاَرْضِ ؕ وَاللّٰهُ
بِكُلِّ شَيْءٍ عَلِيْمٌ ﴿١٧﴾

17. පවසන්න, 'අල්ලාහ් අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද දැන සිටියදී, නුඹලා නුඹලාගේ ධර්මය අල්ලාහ්ට උගන්වන්නෙහුද? තවද අල්ලාහ් සියල්ල මැනැවින් දන්නේය'.

يَمُنُّوْنَ عَلَيْكَ اَنْ اَسْلَمُوْا ؕ قُلْ لَّا تَمُنُّوْا
عَلَيَّ اِسْلَامَكُمْ ۚ بَلِ اللّٰهُ يَمُنُّ عَلَيْكُمْ
اَنْ هَدٰىكُمْ لِلْاِيْمَانِ اِنْ كُنْتُمْ
صٰدِقِيْنَ ﴿١٨﴾

18. ඔවුන් ඉස්ලාම් ධර්මය පිළිගෙන ඔබට උපකාරයක් (කළේ) යැයි ඔවුන් සිතන්නෝය. පවසන්න, 'නුඹලා ඉස්ලාම් ධර්මය වැළඳගැනීම මා හට කළ උපකාරයක් යැයි කියා නොපානු. නොඑසේය අල්ලාහ් නුඹලාට (සැබෑ) විශ්වාසය වෙත මග පෙන්වා නුඹලාට උපකාර කර ඇත්තේය. නුඹලා සත්‍යවාදීන් වන්නේ නම්'.

إِنَّ اللَّهَ يَعْلَمُ غَيْبَ السَّمٰوٰتِ وَالْأَرْضِ ۚ وَاللَّهُ بَصِيرٌۢ بِمَا تَعْمَلُونَ ﴿١٩﴾

19. සැබැවින්ම අල්ලාහ් අහස් සහ පොළොවෙහි ගුප්ත දේ දන්නේය. තවද අල්ලාහ් නුඹලා කරන සියළු දේ දකින්නේය.



කාෆ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

قٓۚ وَٱلۡقُرۡءَانِ ٱلۡمَجِيدِ ②

2. කාෆ්◆ මහිමයට පාත්‍ර වූ මෙම කුර්ආනය (ඔබගේ සත්‍යයට සාක්ෂියක් ලෙස) දිවුරමින්,

بَلۡ عَجِبُوٓاْ أَن جَآءَهُم مُّنذِرٞ مِّنۡهُمۡ فَقَالَ ٱلۡكَٰفِرُونَ هَٰذَا شَيۡءٌ عَجِيبٌ ③

3. එහෙත් ඔවුනතරින්ම අවවාද කරුවෙක් ඔවුන් වෙත පැමිණියේ යැයි ඔවුන් විමතියට පත්වන්නෝය. තවද අවිශ්වාසිතයින් 'මෙය නම් අමුතු දෙයක්යැ!'යි පවසන්නෝය.

أَءِذَا مِتۡنَا وَكُنَّا تُرَابٗاۖ ذَٰلِكَ رَجۡعُۢ بَعِيدٞ ④

4. 'කිමද! අප මරණයට පත් වී පස් දූවිලි බවට පත් වූ කල්හි (අප යළි ජීවයට ගෙන එනු ලබන්නෙමුද?) මෙම ආපසු පැමිණීම ඉතා දුරස්ථ දෙයක්ය'.

قَدۡ عَلِمۡنَا مَا تَنقُصُ ٱلۡأَرۡضُ مِنۡهُمۡۖ وَعِندَنَا كِتَٰبٌ حَفِيظُۢ ⑤

5. පොළොව ඔවුන්ගෙන් කුමක් අඩු කරන්නේ යැයි අපි දනිමු. තවද අප වෙත (සියල්ල) ආරක්ෂා කරන්නාවූ ග්‍රන්ථයක් ඇත.

بَلۡ كَذَّبُواْ بِٱلۡحَقِّ لَمَّا جَآءَهُمۡ فَهُمۡ فِيٓ أَمۡرٖ مَّرِيجٍ ⑥

6. එහෙත්, සත්‍යය ඔවුන් වෙත පැමිණි කල්හි ඔවුන් (එය) බොරු යැයි සැළකූහ. එබැවින් ඔවුන් වියවුල් තත්ත්වයක සිටින්නෝය.

أَفَلَمۡ يَنظُرُوٓاْ إِلَى ٱلسَّمَآءِ فَوۡقَهُمۡ كَيۡفَ بَنَيۡنَٰهَا وَزَيَّنَّٰهَا وَمَا لَهَا مِن فُرُوجٖ ⑦

7. ඔවුනට ඉහළින් ඇති අහස දෙස එය අලංකාර කර එහි කිසිදු කැළලක් නොමැතිව අප එය කෙසේ මවා ඇත්තේදැයි ඔවුන් නොබැලුවේද?

وَٱلۡأَرۡضَ مَدَدۡنَٰهَا وَأَلۡقَيۡنَا فِيهَا رَوَٰسِيَ وَأَنۢبَتۡنَا فِيهَا مِن كُلِّ زَوۡجِۭ بَهِيجٖ ⑧

8. තවද අප පොළොව ව්‍යාප්ත කර, තවද ඒ මත ස්ථිරසාර කඳු පිහිටුවා ඇත්තෙමු. තවද අපි එහි සියළු (වර්ගයේ) අලංකාර ශාක වර්ග වැඩෙන්නට සැලැස්වූවෙමු.

◆බලය ඇත්තා!

| | |
|---|---|
| 9. එය (දෙවියන් වෙතට) හැරෙන්නාවූ සියළු දාසයින් වෙනුවෙන් (අධ්‍යාත්මික) ආලෝකයක් ලෙසද සිහිකිරීමක් ලෙසද වේ. | تَبۡصِرَةً وَّذِكۡرٰى لِكُلِّ عَبۡدٍ مُّنِيۡبٍ ﴿٩﴾ |
| 10. තවද අපි අහසින් ආශිර්වාදයෙන් පිරුණු ජලය පහළ කළෙමු. තවද අපි එමගින් උයන්ද අස්වැන්න නෙළා ගන්නාවූ ධාන්‍යද හටගැන්වීමු. | وَنَزَّلۡنَا مِنَ السَّمَآءِ مَآءً مُّبٰرَكًا فَاَنۡۢبَتۡنَا بِهٖ جَنّٰتٍ وَّحَبَّ الۡحَصِيۡدِ ﴿١٠﴾ |
| 11. තවද එක පිට එක තබන ලද කෝෂවලින් යුත් උස් වූ රටඉඳි ගස්ද. | وَالنَّخۡلَ بٰسِقٰتٍ لَّهَا طَلۡعٌ نَّضِيۡدٌ ﴿١١﴾ |
| 12. (එය අපගේ) දාසයින් හට ජීවනෝපායක් ලෙසය. තවද එමගින් අපි මළ භූමිය ප්‍රාණවත් කළෙමු. මෙලෙසම පුනරුත්ථානයද වනු ඇත. | رِّزۡقًا لِّلۡعِبَادِ ۙ وَاَحۡيَيۡنَا بِهٖ بَلۡدَةً مَّيۡتًا ؕ كَذٰلِكَ الۡخُرُوۡجُ ﴿١٢﴾ |
| 13. ඔවුන්ට පෙර නූහ්ගේ ජනතාවද (එම සත්‍යය) බොරු යැයි සැළකූහ. එමෙන්ම ළිං ආශ්‍රිත (පැරණි අරාබි ගෝත්‍රික) ජනතාවද සමූද්ද (එසේ කළහ). | كَذَّبَتۡ قَبۡلَهُمۡ قَوۡمُ نُوۡحٍ وَّاَصۡحٰبُ الرَّسِّ وَثَمُوۡدُ ﴿١٣﴾ |
| 14. එමෙන්ම ආද්ද ෆිර්අවුන්ද ලූත්ගේ සහෝදරයින්ද, | وَعَادٌ وَّفِرۡعَوۡنُ وَاِخۡوَانُ لُوۡطٍ ﴿١٤﴾ |
| 15. තවද (පැරණි අරාබි ගෝත්‍රික) අයිකා(වනාශ්‍රිත) වැසියන්ද තුබ්බාහි ජනතාවද (ඔවුන්) සියල්ලන්ම දූතයින්ව බොරු යැයි සැළකූහ. එහි ප්‍රතිඵලයක් වශයෙන් මාගේ අවවාදාත්මක දඬුවම (ඔවුනට) අත් විය. | وَّاَصۡحٰبُ الۡاَيۡكَةِ وَقَوۡمُ تُبَّعٍ ؕ كُلٌّ كَذَّبَ الرُّسُلَ فَحَقَّ وَعِيۡدِ ﴿١٥﴾ |
| 16. අපි පළමු මැවීමෙන් වෙහෙසට පත් වී ඇත්තෙමුද? නොඑසේය, නමුත් ඔවුන් නව මැවීම පිළිබඳව වියවුල් තත්වයෙහිය. | اَفَعَيِيۡنَا بِالۡخَلۡقِ الۡاَوَّلِ ؕ بَلۡ هُمۡ فِىۡ لَبۡسٍ مِّنۡ خَلۡقٍ جَدِيۡدٍ ﴿١٦﴾ |
| 17. තවද නිශ්චිතවම අපි මිනිසාව මවා ඇත්තෙමු. තවද ඔහුගේ සිත (ඔහුට) කොඳුරන දේ ගැන අපි | وَلَقَدۡ خَلَقۡنَا الۡاِنۡسَانَ وَنَعۡلَمُ مَا تُوَسۡوِسُ بِهٖ نَفۡسُهٗ ۖۚ وَنَحۡنُ اَقۡرَبُ اِلَيۡهِ مِنۡ |

حَبۡلِ ٱلۡوَرِيدِ ﴿١٧﴾

දැනගන්නෙමු. තවද අපි ඔහුට (ඔහුගේ) බෙලනහරයට වඩා ඉතා සමීපව සිටින්නෙමු.

إِذۡ يَتَلَقَّى ٱلۡمُتَلَقِّيَانِ عَنِ ٱلۡيَمِينِ وَعَنِ ٱلشِّمَالِ قَعِيدٞ ﴿١٨﴾

18. (මිනිසුන්ගේ ක්‍රියාවන්) සටහන් කරන්නාවූ (සුරදූතයින්) දෙදෙනා (එක් අයෙක්) වම් පසින්ද (අනෙක් අයෙක්) දකුණු පසින්ද සිටිමින් සටහන් කරන කල්හි,

مَّا يَلۡفِظُ مِن قَوۡلٍ إِلَّا لَدَيۡهِ رَقِيبٌ عَتِيدٞ ﴿١٩﴾

19. සුපරීක්ෂක (සුරදූත)යෙක් ඔහු සමීපව සිට (සටහන් කිරීමට) සූදානම් වනවා මිස අන් කිසිදු වචනයක්වත් ඔහු කතා කරන්නේ නැත.

وَجَآءَتۡ سَكۡرَةُ ٱلۡمَوۡتِ بِٱلۡحَقِّۖ ذَٰلِكَ مَا كُنتَ مِنۡهُ تَحِيدُ ﴿٢٠﴾

20. එමෙන්ම මරණාසන්න වේදනාව නිශ්චිතවම පැමිණෙනු ඇත. 'නුඹලා මිදී යන්නට තැත් කළේ මෙය වේ'(යැයි කියනු ලැබේ).

وَنُفِخَ فِي ٱلصُّورِۚ ذَٰلِكَ يَوۡمُ ٱلۡوَعِيدِ ﴿٢١﴾

21. තවද සූර් (නලාව) පිඹිනු ලබන්නේය. 'පොරොන්දු වන ලද දිනය මෙය වේ'.

وَجَآءَتۡ كُلُّ نَفۡسٖ مَّعَهَا سَآئِقٞ وَشَهِيدٞ ﴿٢٢﴾

22. තවද සෑම ආත්මයක්ම දක්කාගෙන යන (සුරදූතයෙක්) සහ සාක්ෂි දරන (සුරදූතයෙක්) සමග පැමිණෙනු ඇත.

لَّقَدۡ كُنتَ فِي غَفۡلَةٖ مِّنۡ هَٰذَا فَكَشَفۡنَا عَنكَ غِطَآءَكَ فَبَصَرُكَ ٱلۡيَوۡمَ حَدِيدٞ ﴿٢٣﴾

23. 'නුඹ මේ ගැන සැලකිලිමත් නොවූයෙහිය. දැන් අපි නුඹගේ තිරය නුඹගෙන් ඉවත් කළෙමු. තවද මෙදින නුඹගේ පෙනීම තියුණුව තිබෙන්නේයැ'(යි අපි කියන්නෙමු).

وَقَالَ قَرِينُهُۥ هَٰذَا مَا لَدَيَّ عَتِيدٌ ﴿٢٤﴾

24. 'මා වෙත ඇති සූදානම්ව තිබෙන (වාර්තාව) මෙය වේ'යැයි ඔහුගේ සමීපව සිටින්නා පවසන්නේය.

أَلۡقِيَا فِي جَهَنَّمَ كُلَّ كَفَّارٍ عَنِيدٖ ﴿٢٥﴾

25 (අපි ඔහු සමග සිටි දෙදෙනාට මෙසේ පවසන්නෙමු). 'නුඹලා දෙදෙනා සෑම අකෘතඥ (සත්‍යයෙහි) පරම සතුරෙකුවම නිරයට ඇද දමනු'.

مَّنَّاعٖ لِّلۡخَيۡرِ مُعۡتَدٖ مُّرِيبٍ ﴿٢٦﴾

26. 'යහපත වළක්වන්නාවද, සීමාව ඉක්මවන්නාවද, සැක කරන්නාවද'

27. 'මොහු අල්ලාහ් සමග තවත් දෙවියෙකු ඇති කර ගත්තේය. එහෙයින් මොහුව නුඹලා දෙදෙනා දැඩිවූ දඬුවමට ඇද දමනු'.

الَّذِي جَعَلَ مَعَ اللَّهِ إِلَٰهًا آخَرَ فَأَلْقِيَاهُ فِي الْعَذَابِ الشَّدِيدِ ﴿٢٧﴾

28. ඔහුගේ මිත්‍රයා (මෙසේ) පවසන්නේය. 'අපගේ අධිපතියාණෙනි! මා ඔහුව කැරලිකාර වන්නට නොපෙළඹුවෙමි. නමුත් ඔහුම වරදෙහි ඉතා දුර ගොස්ය'.

قَالَ قَرِينُهُ رَبَّنَا مَا أَطْغَيْتُهُ وَلَٰكِن كَانَ فِي ضَلَالٍ بَعِيدٍ ﴿٢٨﴾

29. (එයට දෙවියන්), 'මා ඉදිරියෙහි රණ්ඩු නොවනු. මා නුඹලාට කල් ඇතුවම අනතුරු ඇඟවීම දුන්නෙමි'යි පවසන්නේය.

قَالَ لَا تَخْتَصِمُوا لَدَيَّ وَقَدْ قَدَّمْتُ إِلَيْكُم بِالْوَعِيدِ ﴿٢٩﴾

30. 'මා ඉදිරියේ කිසිම තීන්දුවක් වෙනස් කරනු නොලබන්නේය. තවද මා කිසිසේත්ම (මාගේ) දාසයින්ට අසාධාරණ කරන්නෙක් නොවෙමි.'

مَا يُبَدَّلُ الْقَوْلُ لَدَيَّ وَمَا أَنَا بِظَلَّامٍ لِّلْعَبِيدِ ﴿٣٠﴾ ع

31. එදින අපි 'නුඹ පිරුණෙහිදැ?'යි නිරයගෙන් අසන්නෙමු. එවිට එය 'තවත් තිබේදැ?'යි පිළිතුරු දෙනු ඇත.

يَوْمَ نَقُولُ لِجَهَنَّمَ هَلِ امْتَلَأْتِ وَتَقُولُ هَلْ مِن مَّزِيدٍ ﴿٣١﴾

32. එමෙන්ම බියබැතිමතුන් සඳහා ස්වර්ගය සමීපයට ගෙන එනු ලබන අතර එය තවදුරටත් දුරස් නොවනු ඇත.

وَأُزْلِفَتِ الْجَنَّةُ لِلْمُتَّقِينَ غَيْرَ بَعِيدٍ ﴿٣٢﴾

33. (ඔවුනට මෙසේ කියනු ලැබේ). 'නුඹලාගෙන් නිරතුරුවම (දෙවියන් වෙත) හැරී (ක්‍රියාවන් ගැන) පරීක්ෂාකාරී වූ සියල්ලන්ටම පොරොන්දු වූ දේ මෙය වේ'.

هَٰذَا مَا تُوعَدُونَ لِكُلِّ أَوَّابٍ حَفِيظٍ ﴿٣٣﴾

34. '(නුඹලාගෙන්) කවුරුන් හෝ මහා කාරුණික (දෙවි)යාණන්ට හුදකලාවෙහි බිය දක්වා එමෙන්ම පසුතැවුණු හදවතින් (ඔහු) වෙත පැමිණෙන්නේද'.

مَّنْ خَشِيَ الرَّحْمَٰنَ بِالْغَيْبِ وَجَاءَ بِقَلْبٍ مُّنِيبٍ ﴿٣٤﴾

35. 'නුඹලා සාමයෙන් එහි ඇතුළු වනු. මෙය සදා වෙසෙන්නා වූ දිනය වේ'.

ادْخُلُوهَا بِسَلَامٍ ۖ ذَٰلِكَ يَوْمُ الْخُلُودِ ﴿٣٥﴾

لَهُمْ مَّا يَشَآءُونَ فِيهَا وَلَدَيْنَا مَزِيدٌ ﴿٣٦﴾

36. ඔවුන් කැමති වන සියල්ල ඔවුන්ට එහිදී ලැබෙනු ඇත. එමෙන්ම එයටත් වඩා (යහපත්) දේද අප වෙත ඇත.

وَكَمْ أَهْلَكْنَا قَبْلَهُم مِّن قَرْنٍ هُمْ أَشَدُّ مِنْهُم بَطْشًا فَنَقَّبُوا۟ فِى ٱلْبِلَٰدِ هَلْ مِن مَّحِيصٍ ﴿٣٧﴾

37. තවද බලයෙන් ඔවුන්ට වඩා ශක්තිමත් වූ පරම්පරා කොපමණක් අපි ඔවුනට පෙර විනාශ කර ඇත්තෙමුද? (නමුත් දඬුවම පැමිණි කල්හි එයින් මිදෙන්නට) ඔවුන් දේශයන්හි සැරි සැරූහ. (ඔවුනට) සරණපැතිමට ස්ථානයක් තිබුණේද?

إِنَّ فِى ذَٰلِكَ لَذِكْرَىٰ لِمَن كَانَ لَهُۥ قَلْبٌ أَوْ أَلْقَى ٱلسَّمْعَ وَهُوَ شَهِيدٌ ﴿٣٨﴾

38. මෙහි සැබැවින්ම හදවතක් ඇති කෙනෙකුට නැතහොත් අවධානයෙන් සවන්දෙන කෙනෙකුට සිහිකිරීමක් ඇත.

وَلَقَدْ خَلَقْنَا ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضَ وَمَا بَيْنَهُمَا فِى سِتَّةِ أَيَّامٍ وَمَا مَسَّنَا مِن لُّغُوبٍ ﴿٣٩﴾

39. තවද සැබැවින්ම අහස් සහ පොළොවද ඒ අතර ඇති සියල්ලද අපි කාලවකවානු සයකදී මැව්වෙමු. තවද අපට කිසිදු වෙහෙසක් ඇති නොවිය.

فَٱصْبِرْ عَلَىٰ مَا يَقُولُونَ وَسَبِّحْ بِحَمْدِ رَبِّكَ قَبْلَ طُلُوعِ ٱلشَّمْسِ وَقَبْلَ ٱلْغُرُوبِ ﴿٤٠﴾

40. එබැවින් ඔවුන් පවසන දේ ඉවසා සිටින්න. එමෙන්ම හිරු උදාවන්නට පෙරද (එය) බැසයන්නට පෙරද (ඔහුගේ) ප්‍රශංසාවෙන් ඔබගේ අධිපතියාණන්ව සුවිශුද්ධ කරන්න.

وَمِنَ ٱلَّيْلِ فَسَبِّحْهُ وَأَدْبَٰرَ ٱلسُّجُودِ ﴿٤١﴾

41. තවද රාත්‍රියේ කොටසෙහිද තවද සුජුද් නමස්කාරයෙන් පසුවද ඔහුව සුවිශුද්ධ කරන්න.

وَٱسْتَمِعْ يَوْمَ يُنَادِ ٱلْمُنَادِ مِن مَّكَانٍ قَرِيبٍ ﴿٤٢﴾

42. තවද (අවධානයෙන්) සවන් දෙනු! කැඳවන්නා එදින සමීප වූ තැනක සිට කැඳවන්නේය.

يَوْمَ يَسْمَعُونَ ٱلصَّيْحَةَ بِٱلْحَقِّ ذَٰلِكَ يَوْمُ ٱلْخُرُوجِ ﴿٤٣﴾

43. එදින ඔවුන්ට නිශ්චිතවම ගිගුරුම් හඬක් ඇසෙන්නේය. එය බැහැර වන දිනය වේ.

إِنَّا نَحْنُ نُحْىِۦ وَنُمِيتُ وَإِلَيْنَا ٱلْمَصِيرُ ﴿٤٤﴾

44. සැබැවින්ම ජීවය දෙන්නේද මරණය දෙන්නේද අපිමය. (අවසානයේදී) ආපසු පැමිණීමද අප වෙතටය.

يَوۡمَ تَشَقَّقُ الۡاَرۡضُ عَنۡهُمۡ سِرَاعًا ؕ ذٰلِكَ حَشۡرٌ عَلَيۡنَا يَسِيۡرٌ ﴿۴۵﴾

45. එදින පොළොව ඔවුන්ට ඉහලින් දෙකඩ වී (ඔවුන්) ලහි ලහියේ (ඉදිරියට) පැමිණෙනු ඇත. එය එක්රැස් කිරීම අපට ඉතා පහසු දෙයකි.

نَحۡنُ اَعۡلَمُ بِمَا يَقُوۡلُوۡنَ وَمَاۤ اَنۡتَ عَلَيۡهِمۡ بِجَبَّارٍ فَذَكِّرۡ بِالۡقُرۡاٰنِ مَنۡ يَّخَافُ وَعِيۡدِ ﴿۴۶﴾

46. ඔවුන් පවසන දේ අපි මැනැවින් දන්නෙමු. තවද ඔබ ඔවුන්ව (කිසිදු ආකාරයකින්වත්) බලකිරීමට නියම කරනු නොලැබුවෙහිය. එබැවින් මාගේ අනතුරු ඇඟවීමට බියදක්වන අයහට කුර්ආනය මගින් අනුශාසනා කරන්න.



අල් zසාරියාත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالذّٰرِيٰتِ ذَرْوًا ۙ ﴿٢﴾

2. (සැබෑ) විසිරීමකින් විසුරුවා හරින (සුළඟ) මත දිවුරමින්,

فَالْحٰمِلٰتِ وِقْرًا ۙ ﴿٣﴾

3. එමෙන්ම ඉතා බර උසුලන (වළාකුළු) මතද,

فَالْجٰرِيٰتِ يُسْرًا ۙ ﴿٤﴾

4. පසුව සෙමෙන් ගමන් කරන දේ මතද,

فَالْمُقَسِّمٰتِ اَمْرًا ۙ ﴿٥﴾

5. පසුව විශේෂ කාර්යය බෙදා හරින දේ මතද,

اِنَّمَا تُوْعَدُوْنَ لَصَادِقٌ ۙ ﴿٦﴾

6. නියතවශයෙන්ම නුඹලාට පොරොන්දුවන දේ සත්‍යයකි.

وَّاِنَّ الدِّيْنَ لَوَاقِعٌ ۗ ﴿٧﴾

7. තවද නියතවශයෙන්ම විනිශ්චය සිදුවන්නේමය.

وَالسَّمَآءِ ذَاتِ الْحُبُكِ ۙ ﴿٨﴾

8. තවද ගමන් පථවලින් යුත් අහස මත දිවුරමින්,

اِنَّكُمْ لَفِيْ قَوْلٍ مُّخْتَلِفٍ ۙ ﴿٩﴾

9. ඇත්තෙන්ම නුඹලා කථාවෙහි භේදබින්න වී සිටින්නෙහුය.

يُّؤْفَكُ عَنْهُ مَنْ اُفِكَ ۗ ﴿١٠﴾

10. මේ හේතුවෙන් යමෙක් (සත්‍යයෙන්) ඉවතට හරවන ලද්දේද ඔහු පමණක් (විශ්වාසයෙන්) ඉවතට හරවනු ලබන්නේය.

قُتِلَ الْخَرّٰصُوْنَ ۙ ﴿١١﴾

11. (බොරු) මවා පාන්නන්හට ශාපය වේ.

الَّذِيْنَ هُمْ فِيْ غَمْرَةٍ سَاهُوْنَ ۙ ﴿١٢﴾

12. ඔවුන් නොසැලකිලිකමෙහි ගිලිහී සිටින්නන්ය.

يَسْـَٔلُوْنَ اَيَّانَ يَوْمُ الدِّيْنِ ۗ ﴿١٣﴾

13. ඔවුහු, 'විනිශ්චය දිනය කෙදිනකදැ?'යි විමසන්නෝය.

يَوْمَ هُمْ عَلَى النَّارِ يُفْتَنُوْنَ ﴿١٤﴾

14. (එය) ඔවුනට ගින්නෙහි දඬුවම දෙනු ලබන දිනය වේ.

15. 'නුඹලා නුඹලාගේ වධ වේදනාව විඳිනු. නුඹලා ඉක්මන් වන්නට පැතූ එය මෙයයි'.

ذُوقُوا فِتْنَتَكُمْ ۖ هَٰذَا الَّذِي كُنتُم بِهِ تَسْتَعْجِلُونَ ﴿١٥﴾

16. (නමුත්) නියතවශයෙන්ම බියබැතිමතුන් උද්‍යානයන් සහ දිය උල්පත් අතරය.

إِنَّ الْمُتَّقِينَ فِي جَنَّاتٍ وَعُيُونٍ ﴿١٦﴾

17. ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන්ට දෙන දේ ලබාගන්නන්ය. නියතවශයෙන්ම මෙයට පෙර ඔවුන් යහපත කරන්නන් වූහ.

آخِذِينَ مَا آتَاهُمْ رَبُّهُمْ ۚ إِنَّهُمْ كَانُوا قَبْلَ ذَٰلِكَ مُحْسِنِينَ ﴿١٧﴾

18. ඔවුන් රාත්‍රියෙහි ස්වල්පයක් මිස නිදා නොගත්තෝය.

كَانُوا قَلِيلًا مِّنَ اللَّيْلِ مَا يَهْجَعُونَ ﴿١٨﴾

19. තවද ඔවුන් අළුයමෙහි ක්‍ෂමාව අයැදිමින් සිටියෝය.

وَبِالْأَسْحَارِ هُمْ يَسْتَغْفِرُونَ ﴿١٩﴾

20. තවද ඔවුන්ගේ වස්තූන්හි යාචකයන්හටද අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්හටද කොටසක් තිබුණි.

وَفِي أَمْوَالِهِمْ حَقٌّ لِّلسَّائِلِ وَالْمَحْرُومِ ﴿٢٠﴾

21. තවද ස්ථිරව විශ්වාස කරන්නන් හට පොළොවෙහි සළකුණු ඇත.

وَفِي الْأَرْضِ آيَاتٌ لِّلْمُوقِنِينَ ﴿٢١﴾

22. එමෙන්ම නුඹලාගේ (ආත්මයන්) තුළද (ඇත). එසේ නම් නුඹලා නොදකින්නෙහුද?

وَفِي أَنفُسِكُمْ ۚ أَفَلَا تُبْصِرُونَ ﴿٢٢﴾

23. තවද නුඹලාගේ ජීවනෝපායද නුඹලාට පොරොන්දු වූ දේද අහසෙහි තිබෙන්නේය.

وَفِي السَّمَاءِ رِزْقُكُمْ وَمَا تُوعَدُونَ ﴿٢٣﴾

24. තවද අහස් සහ පොළොවෙහි අධිපතියාණන් සාක්කි. නුඹලා (එකිනෙකාට) කථා කරන්නාක් මෙන්, නියතවශයෙන්ම මෙය සත්‍යයකි.

فَوَرَبِّ السَّمَاءِ وَالْأَرْضِ إِنَّهُ لَحَقٌّ مِّثْلَ مَا أَنَّكُمْ تَنطِقُونَ ﴿٢٤﴾ ع

25. ඉබ්‍රාහීම්ගේ ගෞරවනීය ආගන්තුකයින්ගේ වෘතාන්තය ඔබ වෙත පැමිණියේද?

هَلْ أَتَاكَ حَدِيثُ ضَيْفِ إِبْرَاهِيمَ الْمُكْرَمِينَ ﴿٢٥﴾

26. ඔවුන් ඔහු වෙත පැමිණි කල්හි, '(ඔබට) සාමය (අත්වේවා!)'යි

إِذْ دَخَلُوا عَلَيْهِ فَقَالُوا سَلَامًا ۖ قَالَ

سَلٰمٌ قَوْمٌ مُّنْكَرُوْنَ ﴿٢٥﴾

පැවසුවෝය. (එයට) ඔහු '(ඔබලාටත්) සාමය (අත්වේවා)!'යි පැවසුවේය. ඔවුන් නාඳුනන අය වූහ.

فَرَاغَ اِلٰٓى اَهْلِهٖ فَجَآءَ بِعِجْلٍ سَمِيْنٍ ﴿٢٦﴾

27. තවද ඔහු ඔහුගේ නිවැසියන් වෙත සන්සුන්ව ගොස් (පුළුස්සපු) තරබාරු වසු පැටවෙකු ගෙන ආවේය.

فَقَرَّبَهٗٓ اِلَيْهِمْ قَالَ اَلَا تَاْكُلُوْنَ ﴿٢٧﴾

28. තවද ඔහු එය ඔවුන් ඉදිරියට ගෙනැවිත්, 'ඔබලා මෙය අනුභව නොකරන්නෙහුදැ?'යි විමසුවේය.

فَاَوْجَسَ مِنْهُمْ خِيْفَةً ؕ قَالُوْا لَا تَخَفْ ؕ وَبَشَّرُوْهُ بِغُلٰمٍ عَلِيْمٍ ﴿٢٨﴾

29. එවිට ඔවුන් ගැන ඔහු තුළ බියක් හටගත්තේය. ඔවුන්, 'බිය නොවන්නැ'යි කීහ. තවද ඔවුන් ඥානවන්ත පුතෙකු(ගේ උපත) පිළිබඳව ශුභාරංචිය ඔහුට දුන්නෝය.

فَاَقْبَلَتِ امْرَاَتُهٗ فِىْ صَرَّةٍ فَصَكَّتْ وَجْهَهَا وَقَالَتْ عَجُوْزٌ عَقِيْمٌ ﴿٢٩﴾

30. එවිට ඔහුගේ භාර්යයාව හඬ නගමින් ඉදිරියට පැමිණ තදින් තම අත මුහුණට ගසමින්, 'මා වඳ වූ මැහැල්ලියක් වෙමි'යි පැවසුවාය.

قَالُوْا كَذٰلِكِ ۙ قَالَ رَبُّكِ ؕ اِنَّهٗ هُوَ الْحَكِيْمُ الْعَلِيْمُ ﴿٣٠﴾

31. ඔවුන්, 'ඔබගේ අධිපතියාණන් කියූ පරිදි එලෙසම (වනු ඇත). නියතවශයෙන්ම ඔහු ප්‍රඥා සම්පන්නය, සියල්ල දත්තායැ'යි කීහ.

قَالَ فَمَا خَطْبُكُمْ اَيُّهَا الْمُرْسَلُوْنَ ﴿٣١﴾

27-කොටස

32. 'එම්බල පණිවිඩකරුවනි! දැන් ඔබලාගේ සංදේශය කුමක්දැ?'යි (ඉබ්රාහීම්) පැවසුවේය.

قَالُوْٓا اِنَّآ اُرْسِلْنَآ اِلٰى قَوْمٍ مُّجْرِمِيْنَ ﴿٣٢﴾

33. ඔවුන්, 'අපි වැරදිකාර ජනතාවක් වෙත එවන ලද්දෙමු'යි පැවසූහ.

لِنُرْسِلَ عَلَيْهِمْ حِجَارَةً مِّنْ طِيْنٍ ﴿٣٣﴾

34. 'එය අප මැටියෙන් වූ ගල් ඔවුන් මත එවනු පිණිසය'.

مُّسَوَّمَةً عِنْدَ رَبِّكَ لِلْمُسْرِفِيْنَ ﴿٣٤﴾

35. '(එය) සීමාව ඉක්මවූවන් සඳහා ඔබගේ අධිපතියාණන් අභියස ලකුණු කරන ලද්දකි'.

فَاَخْرَجْنَا مَنْ كَانَ فِيْهَا مِنَ الْمُؤْمِنِيْنَ ﴿٣٥﴾

36. තවද අපි එහි සිටි විශ්වාසිතයින්ව බැහැර කළෙමු.

37. තවද අපි එහි යටහත්පහත් වුවන්ගෙන් එක් නිවසක් හැර අන් කිසිවක් නොදුටුවෙමු.

فَمَا وَجَدْنَا فِيهَا غَيْرَ بَيْتٍ مِّنَ الْمُسْلِمِينَ ۚ ٣٧

38. තවද වේදනීය දඬුවමකට බිය දක්වන අය හට අපි එහි සළකුණක් ඉතිරිව තැබුවෙමු.

وَتَرَكْنَا فِيهَا آيَةً لِّلَّذِينَ يَخَافُونَ الْعَذَابَ الْأَلِيمَ ٣٨

39. තවද අපි ඔහුව(මූසාව) ෆිර්අවුන් වෙත පැහැදිලි සාක්ෂි සමග එවූ කල්හි, (අපි) මූසා තුලද (තවත් සළකුණක් තැබුවෙමු).

وَفِي مُوسَىٰ إِذْ أَرْسَلْنَاهُ إِلَىٰ فِرْعَوْنَ بِسُلْطَانٍ مُّبِينٍ ٣٩

40. එබැවින් ඔහු තම කල්ලි නායකයින් සමග ඉවත හැරී, '(මූසා) මායාකරුවෙක් නැතහොත් උමතුවෙක්' යැයි කීවේය.

فَتَوَلَّىٰ بِرُكْنِهِ وَقَالَ سَاحِرٌ أَوْ مَجْنُونٌ ٤٠

41. එහෙයින් අපි ඔහු සහ ඔහුගේ සේනාවන් හසුකරගෙන ඔවුන්ව මුහුදෙහි ඇද දැමුවෙමු. තවද ඔහු (තමන්ටම) දොස් පවරනු ලබන්නෙක් විය.

فَأَخَذْنَاهُ وَجُنُودَهُ فَنَبَذْنَاهُمْ فِي الْيَمِّ وَهُوَ مُلِيمٌ ٤١

42. තවද ආද්(ගේ ගෝත්‍රයෙ)හිද (සළකුණක් විය). එවිට අපි ඔවුන් කෙරෙහි වනසන්නාවූ චණ්ඩ මාරුතයක් යැව්වෙමු.

وَفِي عَادٍ إِذْ أَرْسَلْنَا عَلَيْهِمُ الرِّيحَ الْعَقِيمَ ٤٢

43. එය කුමක් හරහා ගියේද, එහි සියල්ල පල් වූ ඇටකටු මෙන් ඉතිරි කළා මිස අන්කිසිවක් නොවීය.

مَا تَذَرُ مِن شَيْءٍ أَتَتْ عَلَيْهِ إِلَّا جَعَلَتْهُ كَالرَّمِيمِ ٤٣

44. තවද සමූද්(ගේ ගෝත්‍රයෙ)හිද (සළකුණක් විය). එනම් 'ටික කලකට නුඹලා භුක්ති විඳිනු'යි ඔවුනට පවසන ලදි.

وَفِي ثَمُودَ إِذْ قِيلَ لَهُمْ تَمَتَّعُوا حَتَّىٰ حِينٍ ٤٤

45. නමුත් ඔවුන් ඔවුන්ගේ අධිපතියාණන්ගේ අණට එරෙහිව කැරලි ගැසූහ. එබැවින් ඔවුන් බලා සිටියදීම අකුණු සැර ඔවුන්ව හසුකරගත්තේය.

فَعَتَوْا عَنْ أَمْرِ رَبِّهِمْ فَأَخَذَتْهُمُ الصَّاعِقَةُ وَهُمْ يَنظُرُونَ ٤٥

فَمَا اسْتَطَاعُوا مِنْ قِيَامٍ وَمَا كَانُوا مُنْتَصِرِينَ ﴿٤٦﴾

46. තවද ඔවුනට (නැවත) නැගී සිටීමටද නොහැකි විය. එමෙන්ම තමන්ට උදව් ලබා ගැනීමටද නොහැකි විය.

وَقَوْمَ نُوحٍ مِنْ قَبْلُ ۖ إِنَّهُمْ كَانُوا قَوْمًا فَاسِقِينَ ﴿٤٧﴾

47. තවද (ඔවුනට) පෙර නූහ්ගේ ජනතාවද (අපි විනාශ කළෙමු). නියතවශයෙන්ම ඔවුන් අකීකරු ජනතාවක් වූහ.

وَالسَّمَاءَ بَنَيْنَاهَا بِأَيْدٍ وَإِنَّا لَمُوسِعُونَ ﴿٤٨﴾

48. තවද අපි අහස ශක්තිමත්ව නිර්මාණය කර ඇත්තෙමු. තවද අපි ඇත්තෙන්ම (එය) නොකඩවා ව්‍යාප්ත කරන්නන් වෙමු.

وَالْأَرْضَ فَرَشْنَاهَا فَنِعْمَ الْمَاهِدُونَ ﴿٤٩﴾

49. පොළොවද අපි විහිදුවා ඇත්තෙමු. තවද (අප) ඒවා (කෙතරම්) විශිෂ්ඨත්වයෙන් පිළියෙල කරන්නන්ද!

وَمِنْ كُلِّ شَيْءٍ خَلَقْنَا زَوْجَيْنِ لَعَلَّكُمْ تَذَكَّرُونَ ﴿٥٠﴾

50. තවද නුඹලා මෙනෙහි කරනු පිණිස අපි සියළු දේ ජෝඩු වශයෙන් මවා ඇත්තෙමු.

فَفِرُّوا إِلَى اللَّهِ ۖ إِنِّي لَكُمْ مِنْهُ نَذِيرٌ مُبِينٌ ﴿٥١﴾

51. එබැවින් නුඹලා අල්ලාහ් වෙතට කඩිනමින් දිවයනු. නියතවශයෙන්ම මම ඔහු වෙතින් (පැමිණි) පැහැදිලි අවවාද කරන්නෙක් වෙමි.

وَلَا تَجْعَلُوا مَعَ اللَّهِ إِلَٰهًا آخَرَ ۖ إِنِّي لَكُمْ مِنْهُ نَذِيرٌ مُبِينٌ ﴿٥٢﴾

52. තවද අල්ලාහ් සමග තවත් දෙවියෙකු ඇති කර නොගනු. නියතවශයෙන්ම මම ඔහු වෙතින් (පැමිණි) අවවාද කරන්නෙක්ම වෙමි.

كَذَٰلِكَ مَا أَتَى الَّذِينَ مِنْ قَبْلِهِمْ مِنْ رَسُولٍ إِلَّا قَالُوا سَاحِرٌ أَوْ مَجْنُونٌ ﴿٥٣﴾

53. මෙයාකාරයට ඔවුන්ට පෙර ඔවුන් වෙත පැමිණි කිසිදු දූතයෙකුට ඔවුන්, 'මායාකරුවෙක් නැතහොත් උමතුවෙක්!'යැයි කීවා මිස නැත.

أَتَوَاصَوْا بِهِ ۚ بَلْ هُمْ قَوْمٌ طَاغُونَ ﴿٥٤﴾

54. ඔවුන් එකිනෙකාගෙන් එය උරුම කර ගත්තෝද? නොඑසේය, ඔවුන් (සියල්ල) කැරලිකාර ජනතාවකි.

فَتَوَلَّ عَنْهُمْ فَمَآ أَنْتَ بِمَلُوْمٍ ۝٥٥

55. එබැවින් ඔවුන්ගෙන් ඉවත හැරෙන්න. තවද ඔබ කෙරෙහි දොස් නොපවරනු ලබන්නේය.

وَّذَكِّرْ فَإِنَّ الذِّكْرٰى تَنْفَعُ الْمُؤْمِنِيْنَ ۝٥٦

56. තවද අනුශාසනා කරමින් සිටින්න. නිශ්චිතවම අනුශාසනා කිරීම විශ්වාසීතයින්හට ඵලදායී වනු ඇත.

وَمَا خَلَقْتُ الْجِنَّ وَالْإِنْسَ إِلَّا لِيَعْبُدُوْنِ ۝٥٧

57. තවද මා ජින්වරුන්ව සහ මිනිසුන්ව ඔවුන් මාව නැමදීමට මිස මවා නොමැත.

مَآ أُرِيْدُ مِنْهُمْ مِّنْ رِّزْقٍ وَّمَآ أُرِيْدُ أَنْ يُّطْعِمُوْنِ ۝٥٨

58. මම ඔවුන්ගෙන් කිසිදු ජීවනෝපායක් නොපතන්නෙමි. එමෙන්ම ඔවුන් මා හට ආහාර දිය යුතු යැයිද නොපතන්නෙමි.

إِنَّ اللّٰهَ هُوَ الرَّزَّاقُ ذُو الْقُوَّةِ الْمَتِيْنُ ۝٥٩

59. නියතවශයෙන්ම අල්ලාහ්ම බෙහෙවින් ජීවනෝපාය සලසන්නාය. බලවත්ය, ශක්තිමත්ය.

فَإِنَّ لِلَّذِيْنَ ظَلَمُوْا ذَنُوْبًا مِّثْلَ ذَنُوْبِ أَصْحٰبِهِمْ فَلَا يَسْتَعْجِلُوْنِ ۝٦٠

60. නියතවශයෙන්ම වැරදි කරන්නන් තම මිතුරන්ගේ (වැරදි ක්‍රියාවෙහි) කොටස මෙන් තමන්ගේ කොටසද උපයාගෙන ඇත්තෝය. එබැවින් (දඬුවම) කඩිනම් වීමට ඔවුන් මාගෙන් නොපතත්වා.

فَوَيْلٌ لِّلَّذِيْنَ كَفَرُوْا مِنْ يَّوْمِهِمُ الَّذِيْ يُوْعَدُوْنَ ۝٦١ ع

61. එබැවින් අවිශ්වාසීතයන්හට ඔවුන්ට පොරොන්දු වන ලද ඔවුන්ගේ එම දිනය හේතුවෙන් විපතකි!



අල් තූර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①
1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالطُّوْرِ ②
2. තූර් (කන්ද) මත දිවුරමින්,

وَكِتٰبٍ مَّسْطُوْرٍ ③
3. ලියන ලද ග්‍රන්ථය මතද,

فِيْ رَقٍّ مَّنْشُوْرٍ ④
4. (එය) දිගහරින ලද පත්‍රයෙහිය,

وَّالْبَيْتِ الْمَعْمُوْرِ ⑤
5. නිතර නිතර ගැවසෙන්නාවූ නිවස මතද,

وَالسَّقْفِ الْمَرْفُوْعِ ⑥
6. උස් කරන ලද වියන මතද,

وَالْبَحْرِ الْمَسْجُوْرِ ⑦
7. රළ නංවන්නා වූ සයුර මතද,

اِنَّ عَذَابَ رَبِّكَ لَوَاقِعٌ ⑧
8. නියතවශයෙන්ම ඔබ අධිපතියාණන්ගේ දඬුවම සිදුවන්නේමය.

مَّا لَهٗ مِنْ دَافِعٍ ⑨
9. එය වැළැක්විය හැකි කිසිවෙක් නැත.

يَّوْمَ تَمُوْرُ السَّمَآءُ مَوْرًا ⑩
10. එදින වලාකුළු දැඩි කැළඹීමකින් යුතුව සෙලවෙන්නේය.

وَّتَسِيْرُ الْجِبَالُ سَيْرًا ⑪
11. තවද කඳු දරුණු ලෙස සෙලවෙනු ඇත.

فَوَيْلٌ يَّوْمَئِذٍ لِّلْمُكَذِّبِيْنَ ⑫
12. එබැවින් (සත්‍යය) බොරු කරන්නන්ට එදින ශාපයයි.

الَّذِيْنَ هُمْ فِيْ خَوْضٍ يَّلْعَبُوْنَ ⑬
13. ඔවුන් පුහු බසෙහි ගිලිහි විනෝද වෙති.

يَوْمَ يُدَعُّوْنَ اِلٰى نَارِ جَهَنَّمَ دَعًّا ⑭
14. එදින ඔවුන් තදින් නිරා ගින්න දෙසට තල්ලු කරනු ලබන්නෝය.

هٰذِهِ النَّارُ الَّتِيْ كُنْتُمْ بِهَا تُكَذِّبُوْنَ ⑮
15. 'නුඹලා බොරුවක් යැයි සැළකූ ගින්න මෙය වේ'.

16. 'මෙය මායාවක්ද නැතහොත් නුඹලා (තවමත්) නොදැක්කෙහුද?'

أَفَسِحْرٌ هَٰذَآ أَمْ أَنتُمْ لَا تُبْصِرُونَ ١٦

17. 'නුඹලා එහි දැවෙනු. තවද නුඹලා ඉවසාගෙන සිටියත් එසේ නුඹලා ඉවසාගෙන නොසිටියත් එය නුඹලාට එක හා සමානය. නුඹලා කරමින් සිටි දේටම නුඹලා ඵලවිපාක දෙනු ලබන්නේය.'

اصْلَوْهَا فَاصْبِرُوٓا أَوْ لَا تَصْبِرُوا سَوَآءٌ عَلَيْكُمْ إِنَّمَا تُجْزَوْنَ مَا كُنتُمْ تَعْمَلُونَ ١٧

18. සැබැවින්ම බියබැතිමතුන් උද්‍යානයන්හි හා දිව්‍ය සැපතෙහිය.

إِنَّ الْمُتَّقِينَ فِى جَنَّٰتٍ وَنَعِيمٍ ١٨

19. ඔවුන්ගේ අධිපතියාණන් ඔවුනට පිරිනැමූ දෙයින් ප්‍රීති වන්නන්ය. තවද ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන්ව නිරයේ දඬුවමින් ආරක්ෂා කර ඇත්තේය.

فَٰكِهِينَ بِمَآ ءَاتَىٰهُمْ رَبُّهُمْ وَوَقَىٰهُمْ رَبُّهُمْ عَذَابَ الْجَحِيمِ ١٩

20. (ඔහු) 'නුඹලා කරමින් සිටි දේ හේතුවෙන් ප්‍රමෝදයෙන් අනුභව කරනු, පානය කරනු'(යි කියන්නේය).

كُلُوا وَاشْرَبُوا هَنِيٓـًٔا بِمَا كُنتُمْ تَعْمَلُونَ ٢٠

21. 'පෙළට තබා ඇති සෝපාවන්හි හාන්සි වී සිටින්නෝය'. තවද අපි විස්මිත නෙත්වලින් යුත් අප්සරාවන් ඔවුන්ට ඇසුරු කරවන්නෙමු.

مُتَّكِـِٔينَ عَلَىٰ سُرُرٍ مَّصْفُوفَةٍ وَزَوَّجْنَٰهُم بِحُورٍ عِينٍ ٢١

22. තවද විශ්වාස කරන්නන්වද විශ්වාසයෙහි ඔවුන්ව පිළිපදින ඔවුන්ගේ දරුවන්වද ගත්කල අපි ඔවුන් සමග ඔවුන්ගේ දරුවන්ව (ස්වර්ගයන්හි) එක් කරන්නෙමු. තවද අපි ඔවුන්ගේ ක්‍රියාවන්හි (තිළිණයන්) කිසිවක් අඩු නොකරන්නෙමු. සෑම මිනිසෙක්ම තමන් ඉපැයූ දෙයට වගකිව යුත්තාය.

وَالَّذِينَ ءَامَنُوا وَاتَّبَعَتْهُمْ ذُرِّيَّتُهُم بِإِيمَٰنٍ أَلْحَقْنَا بِهِمْ ذُرِّيَّتَهُمْ وَمَآ أَلَتْنَٰهُم مِّنْ عَمَلِهِم مِّن شَىْءٍ كُلُّ امْرِئٍۭ بِمَا كَسَبَ رَهِينٌ ٢٢

23. තවද අපි ඔවුනට ඔවුන් ප්‍රිය කරන දෙයින් පළතුරුද මාංශද (බහුලව) පිරිනමන්නෙමු.

وَأَمْدَدْنَٰهُم بِفَٰكِهَةٍ وَلَحْمٍ مِّمَّا يَشْتَهُونَ ٢٣

24. එහිදී ඔවුන් එකිනෙකා බඳුනක් අතිනතට යවා ගනිති. එහිදී කිසිදු පුහු බස්ද නොවන්නේය. තවද පාප කර්මයක්ද නොවන්නේය.

يَتَنَٰزَعُونَ فِيهَا كَأْسًا لَّا لَغْوٌ فِيهَا وَلَا تَأْثِيمٌ ٢٤

وَيَطُوفُ عَلَيْهِمْ غِلْمَانٌ لَّهُمْ كَأَنَّهُمْ لُؤْلُؤٌ مَّكْنُونٌ ﴿٢٥﴾

25. තවද ඔවුන් වෙනුවෙන් මනාව ආරක්ෂා කරන ලද මුතුමෙන් තරුණයින් ඔවුන් වටා (ආවතේව කිරීමට බලා) සිටින්නෝය.

وَأَقْبَلَ بَعْضُهُمْ عَلَىٰ بَعْضٍ يَتَسَاءَلُونَ ﴿٢٦﴾

26. තවද ඔවුන් ඇතැමෙකු ඇතැමෙකුගෙන් මුහුණට මුහුණලා හැරී විමසන්නෝය.

قَالُوا إِنَّا كُنَّا قَبْلُ فِي أَهْلِنَا مُشْفِقِينَ ﴿٢٧﴾

27. ඔවුන් (මෙසේ) කියන්නෝය, 'නියතවශයෙන්ම අපි මීට පෙර අපගේ පවුලේ අය සමග (දෙවියන්ගේ අප්‍රසාදයට) මහත් බියෙන් සිටියෙමු'.

فَمَنَّ اللَّهُ عَلَيْنَا وَوَقَانَا عَذَابَ السَّمُومِ ﴿٢٨﴾

28. 'නමුත් අල්ලාහ් අප හට කාරුණික වූයේය. තවද අග්නි සුළඟේ දඬුවමින් අපව ආරක්ෂා කළේය'.

إِنَّا كُنَّا مِن قَبْلُ نَدْعُوهُ ۖ إِنَّهُ هُوَ الْبَرُّ الرَّحِيمُ ﴿٢٩﴾

29. 'නියතවශයෙන්ම මීට පෙර සිටම අපි ඔහු අයැදිමින් සිටියෙමු. නියතවශයෙන්ම ඔහු ත්‍යාගශීලිය, පරම දයාබරය.'

فَذَكِّرْ فَمَا أَنتَ بِنِعْمَتِ رَبِّكَ بِكَاهِنٍ وَلَا مَجْنُونٍ ﴿٣٠﴾

30. එහෙයින් අනුශාසනා කරමින් සිටින්න. ඔබගේ අධිපතියාණන්ගේ අනුග්‍රහයෙන් ඔබ පේන කියන්නෙකුද නොවේ, උමතුවෙක්ද නොවේ.

أَمْ يَقُولُونَ شَاعِرٌ نَّتَرَبَّصُ بِهِ رَيْبَ الْمَنُونِ ﴿٣١﴾

31. '(ඔහු) කවියෙකි. කාලයාගේ ඇවෑමෙන් ඔහුට ඇතිවන විපත අපි බලා සිටින්නෙමු'යි ඔවුන් කියන්නෝද?

قُلْ تَرَبَّصُوا فَإِنِّي مَعَكُم مِّنَ الْمُتَرَبِّصِينَ ﴿٣٢﴾

32. පවසන්න, 'එසේ නම් නුඹලා බලාසිටිනු! නියතවශයෙන්ම මමද නුඹලා සමග බලාසිටින්නෙමි'.

أَمْ تَأْمُرُهُمْ أَحْلَامُهُم بِهَٰذَا ۚ أَمْ هُمْ قَوْمٌ طَاغُونَ ﴿٣٣﴾

33. ඔවුන්ගේ බුද්ධිය ඔවුනට මෙය අණ කරන්නේද? නැතහොත් ඔවුන් කලහකාරී ජනතාවක්ද?

أَمْ يَقُولُونَ تَقَوَّلَهُ ۚ بَل لَّا يُؤْمِنُونَ ﴿٣٤﴾

34. ඔවුන්, 'ඔහු මෙය ගෙතුවේයැ'යි කියන්නෝද? නොඑසේය, නමුත් ඔවුන් විශ්වාස නොකරන්නෝය.

| | |
|---|---|
| 35. ඔවුන් සත්‍යය පවසන්නේ නම්, මෙවන් ප්‍රකාශයක් ගෙන එත්වා! | فَلْيَأْتُوْا بِحَدِيْثٍ مِّثْلِهٖۤ اِنْ كَانُوْا صٰدِقِيْنَ ؕ ٣٥ |
| 36. ඔවුන් කිසිදු දෙයකින් තොරව (ඉබේම) මවනු ලද්දන්ද? නැත්නම් ඔවුන්ම තමන්ගේ මැවුම්කරුවන්ද? | اَمْ خُلِقُوْا مِنْ غَيْرِ شَيْءٍ اَمْ هُمُ الْخٰلِقُوْنَ ؕ ٣٦ |
| 37. ඔවුන් අහස් සහ පොළොව මැව්වේද? නොඑසේය, නමුත් ඔවුනට ස්ථිර විශ්වාසයක් නොමැත. | اَمْ خَلَقُوا السَّمٰوٰتِ وَالْاَرْضَ ۚ بَلْ لَّا يُوْقِنُوْنَ ؕ ٣٧ |
| 38. ඔබගේ අධිපතියාණන්ගේ වස්තූන් ඔවුන් සතුව තිබේද? නැත්නම් ඔවුන් එයට භාරකරුවන්ද? | اَمْ عِنْدَهُمْ خَزَآئِنُ رَبِّكَ اَمْ هُمُ الْمُصَيْطِرُوْنَ ؕ ٣٨ |
| 39. (අහස වෙතට නැගී ගොස්) එහි සියල්ල අසාගැනීමට ඔවුන් සතුව ඉණිමගක් තිබේද? එසේ නම් ඔවුන්ගේ ඇහුම්කන් දෙන්නා පැහැදිලි සාධකයක් ගෙන එත්වා! | اَمْ لَهُمْ سُلَّمٌ يَّسْتَمِعُوْنَ فِيْهِ ۚ فَلْيَاْتِ مُسْتَمِعُهُمْ بِسُلْطٰنٍ مُّبِيْنٍ ؕ ٣٩ |
| 40. ඔහුට දූවරුන් නුඹලාට පුතුන්ද? | اَمْ لَهُ الْبَنٰتُ وَلَكُمُ الْبَنُوْنَ ؕ ٤٠ |
| 41. ඔබ ඔවුන්ගෙන් ප්‍රතිලාභයක් ඉල්ලන්නෙහිද? එමනිසා ඔවුන් ණය බරින් පටවනු ලබන්නෝද? | اَمْ تَسْـَٔلُهُمْ اَجْرًا فَهُمْ مِّنْ مَّغْرَمٍ مُّثْقَلُوْنَ ؕ ٤١ |
| 42. ගුප්ත දේ (පිළිබඳව දැනුම) ඔවුන් සතුව තිබේද? එමනිසා ඔවුන් ඒවා ලියන්නෝද? | اَمْ عِنْدَهُمُ الْغَيْبُ فَهُمْ يَكْتُبُوْنَ ؕ ٤٢ |
| 43. ඔවුන් කුමන්ත්‍රණය කිරීමට අදහස් කරන්නෝද? නමුත් අවිශ්වාස කරන්නන්ම කුමන්ත්‍රණයට හසු වන්නෝය. | اَمْ يُرِيْدُوْنَ كَيْدًا ؕ فَالَّذِيْنَ كَفَرُوْا هُمُ الْمَكِيْدُوْنَ ؕ ٤٣ |
| 44. ඔවුනට අල්ලාහ් හැර වෙනත් නැමදීමට සුදුස්සෙක් සිටින්නේද? ඔවුන් සමාන තබන දෙයින් අල්ලාහ් සුවිශුද්ධය. | اَمْ لَهُمْ اِلٰهٌ غَيْرُ اللّٰهِ ؕ سُبْحٰنَ اللّٰهِ عَمَّا يُشْرِكُوْنَ ٤٤ |

45. තවද ඔවුන් වලාකුළු කැබැල්ලක් වැටෙනු දුටුවේ නම්, 'ඝන වලාකුළු තට්ටුවක්යැ'යි ඔවුන් පවසන්නෝය.

وَإِن يَرَوْا كِسْفًا مِّنَ السَّمَاءِ سَاقِطًا يَقُولُوا سَحَابٌ مَّرْكُومٌ ﴿٤٥﴾

46. එබැවින් අකුණුපහර ඔවුන්ව හසුකරගන්නා ඔවුන්ගේ (පොරොන්දු වූ) එම දිනය ඔවුනට හමුවන තෙක් ඔවුන්ව හැර දමනු.

فَذَرْهُمْ حَتَّىٰ يُلَاقُوا يَوْمَهُمُ الَّذِي فِيهِ يُصْعَقُونَ ﴿٤٦﴾

47. එදින ඔවුන්ගේ කුමන්ත්‍රණය ඔවුන්ට කිසිඳු ඵලක් ගෙන නොදෙනු ඇත. තවද ඔවුන් උදවු කරනු නොලබන්නෝය.

يَوْمَ لَا يُغْنِي عَنْهُمْ كَيْدُهُمْ شَيْئًا وَلَا هُمْ يُنصَرُونَ ﴿٤٧﴾

48. තවද සැබැවින්ම වැරදි කරන්නන්හට මෙය හැර (තවත්) දඬුවමක්ද ඇත. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය නොදන්නෝය.

وَإِنَّ لِلَّذِينَ ظَلَمُوا عَذَابًا دُونَ ذَٰلِكَ وَلَٰكِنَّ أَكْثَرَهُمْ لَا يَعْلَمُونَ ﴿٤٨﴾

49. එබැවින් ඔබගේ අධිපතියාණන්ගේ විනිශ්චය (එන) තෙක් ඉවසිල්ලෙන් බලාසිටින්න. ඇත්තෙන්ම ඔබ අපගේ ඇස් ඉදිරියෙහිය. තවද ඔබ (නැමදීම සඳහා) අවදිවන විටදී ඔබගේ අධිපතියාණන්ගේ ප්‍රශංසාවෙන් (ඔහුව) සුවිශුද්ධ කරන්න.

وَاصْبِرْ لِحُكْمِ رَبِّكَ فَإِنَّكَ بِأَعْيُنِنَا وَسَبِّحْ بِحَمْدِ رَبِّكَ حِينَ تَقُومُ ﴿٤٩﴾

50. තවද රාත්‍රියෙහි කොටසකදීද තාරකා නොපෙනෙන විටදීද ඔහුව සුවිශුද්ධ කරන්න.

وَمِنَ اللَّيْلِ فَسَبِّحْهُ وَإِدْبَارَ النُّجُومِ ﴿٥٠﴾




## අල් නජ්ම්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالنَّجۡمِ اِذَا هَوٰى ۙ ۝٢

2. (සුරෙයියා)තාරකාව, එය හැළෙන විට දිවුරමින්,

مَا ضَلَّ صَاحِبُكُمۡ وَمَا غَوٰى ۚ ۝٣

3. නුඹලාගේ සගයා වැරදි කළේද නැත. නොමග ගියේද නැත.

وَمَا يَنۡطِقُ عَنِ الۡهَوٰى ؕ ۝٤

4. ඔහු (ස්ව)කැමැත්තෙන් කතා කරන්නේද නැත.

اِنۡ هُوَ اِلَّا وَحۡىٌ يُّوۡحٰى ۙ ۝٥

5. මෙය (දෙවියන් විසින්) අනාවරණය කරන ලද (පාරිශුද්ධ වූ) අනාවරණයක් මිස නැත.

عَلَّمَهٗ شَدِيۡدُ الۡقُوٰى ۙ ۝٦

6. ඉමහත් ශක්තිවන්ත(දෙවියන්) ඔහුට ඉගැන්වූයේය.

ذُوۡ مِرَّةٍ ؕ فَاسۡتَوٰى ۙ ۝٧

7. ප්‍රඥාවන්තය, එබැවින් ඔහු (සිහසුනෙහි) ස්ථාවර විය.

وَهُوَ بِالۡاُفُقِ الۡاَعۡلٰى ؕ ۝٨

8. තවද ඔහු ඉහළ ක්ෂිතිජයෙහි සිටියේය.

ثُمَّ دَنَا فَتَدَلّٰى ۙ ۝٩

9. පසුව ඔහු (දෙවියන් වෙතට) සමීප විය. පසුව ඔහු (මිනිස් වර්ගයා වෙතට) බැස ආවේය.

فَكَانَ قَابَ قَوۡسَيۡنِ اَوۡ اَدۡنٰى ۚ ۝١٠

10. පසුව ඔහු දුනු දෙකේ කෙළවර අතර ඇති පරතරය මෙන් හෝ ඊටත් වඩා සමීප විය.

فَاَوۡحٰۤى اِلٰى عَبۡدِهٖ مَاۤ اَوۡحٰى ؕ ۝١١

11. පසුව ඔහු අනාවරණය කළ යුතු දේ තම දාසයා වෙතට අනාවරණය කළේය.

مَا كَذَبَ الۡفُؤَادُ مَا رَاٰى ۝١٢

12. (වක්තෘවරයා) දුටු දේ හදවත බොරු නොකළේය.

اَفَتُمٰرُوۡنَهٗ عَلٰى مَا يَرٰى ۝١٣

13. එසේනම්, ඔහු දුටු දේ පිළිබඳව නුඹලා ඔහු සමග තර්ක කරන්නෙහුද?

وَلَقَدۡ رَاٰهُ نَزۡلَةً اُخۡرٰىۙ ﴿١٤﴾

14. තවද නිශ්චිතවම ඔහු දෙවන වරට ඔහුව(අල්ලාහ්ව) දුටුවේය.

عِنۡدَ سِدۡرَةِ الۡمُنۡتَهٰى ﴿١٥﴾

15. ඉතාමත් ඈතින් වූ සිද්රා (මසන් ගස) අසලදීය,

عِنۡدَهَا جَنَّةُ الۡمَاۡوٰىؕ ﴿١٦﴾

16. එයට සමීපව නිත්‍ය වාසස්ථානය වන උද්‍යානය වේ.

اِذۡ يَغۡشَى السِّدۡرَةَ مَا يَغۡشٰىۙ ﴿١٧﴾

17. සිද්රා (මසන් ගස) ආවරණය කරන දේ ආවරණය කළ කල්හි.

مَا زَاغَ الۡبَصَرُ وَمَا طَغٰى ﴿١٨﴾

18. (ඔහුගේ) ඇස (එයින්) ඉවතට නොගිය අතර සීමාවද ඉක්ම නොවීය.

لَقَدۡ رَاٰى مِنۡ اٰيٰتِ رَبِّهِ الۡكُبۡرٰى ﴿١٩﴾

19. නියතවශයෙන්ම ඔහු ඔහුගේ අධිපතියාණන්ගේ සළකුණු අතුරින් ශ්‍රේෂ්ඨතම (සළකුණක්) දුටුවේය.

اَفَرَءَيۡتُمُ اللّٰتَ وَالۡعُزّٰىۙ ﴿٢٠﴾

20. දැන් 'ලාත්'◆ සහ 'උzස්zසා'◆ ගැන (මා හට) කියාදෙනු.

وَمَنٰوةَ الثَّالِثَةَ الۡاُخۡرٰى ﴿٢١﴾

21. එමෙන්ම තෙවැන්නා, තවත් (දෙවඟනක් වන) 'මනාත්'◆ ගැනද (මා හට කියාදෙනු).

اَلَـكُمُ الذَّكَرُ وَلَهُ الۡاُنۡثٰى ﴿٢٢﴾

22. 'කිමද! පිරිමින් නුඹලාට ගැහැණුන් ඔහුටද!'

تِلۡكَ اِذًا قِسۡمَةٌ ضِيۡزٰى ﴿٢٣﴾

23. එය ඇත්තෙන්ම අසාධාරණ වූ බෙදුමකි.

اِنۡ هِىَ اِلَّاۤ اَسۡمَآءٌ سَمَّيۡتُمُوۡهَاۤ اَنۡتُمۡ وَاٰبَآؤُكُمۡ مَّاۤ اَنۡزَلَ اللّٰهُ بِهَا مِنۡ سُلۡطٰنٍ‌ؕ اِنۡ يَّتَّبِعُوۡنَ اِلَّا الظَّنَّ وَمَا تَهۡوَى الۡاَنۡفُسُ‌ۚ وَلَقَدۡ جَآءَهُمۡ مِّنۡ رَّبِّهِمُ الۡهُدٰىؕ ﴿٢٤﴾

24. 'මේවා නුඹලාද නුඹලාගේ පියවරුන්ද නම් කර ඇති නාමයන් මිස නැත. මේ සඳහා අල්ලාහ් කිසිදු සාධකයක් පහළ කර නොමැත්තේය.' ඔවුන් අනුගමනය කරන්නේ අනුමානය හා ඔවුන්ගේ ආත්මයන් ආශා කරන දේ මිස නැත. තවද ඔවුන්ගේ අධිපතියාණන්ගෙන් ඔවුන් වෙත මගපෙන්වීම මෙලහකටත් පැමිණ ඇත.

◆මක්කාහි කුරෛෂිවරුන්ගේ ප්‍රියතම ප්‍රතිමාවන්.

25. තමා ආශා කරන සියල්ලම මිනිසාට ලැබෙන්නේද?

أَمْ لِلْإِنسَٰنِ مَا تَمَنَّىٰ ﴿٢٥﴾

26. එහෙත් (සියල්ලෙහි) අවසානයත් ආරම්භයත් අල්ලාහ් සතුය.

فَلِلَّهِ ٱلْءَاخِرَةُ وَٱلْأُولَىٰ ﴿٢٦﴾

27. තවද අහස්හි කොපමණක් සුරදූතයින්ද? අල්ලාහ් තමා අභිමත අය කෙරෙහි තෘප්තිමත් වෙමින් අනුමැතිය ලබා දුන් පසුව මිස ඔවුන්ගේ මැදිහත්වීම කිසිදු ඵලක් නොවන්නේය.

وَكَم مِّن مَّلَكٍ فِى ٱلسَّمَٰوَٰتِ لَا تُغْنِى شَفَٰعَتُهُمْ شَيْـًٔا إِلَّا مِنۢ بَعْدِ أَن يَأْذَنَ ٱللَّهُ لِمَن يَشَآءُ وَيَرْضَىٰٓ ﴿٢٧﴾

28. පරලොව කෙරෙහි විශ්වාස නොකරන්නන්, ස්ත්‍රී නම්වලින් සුරදූතයින් හට නාමයන් තබන්නෝය.

إِنَّ ٱلَّذِينَ لَا يُؤْمِنُونَ بِٱلْءَاخِرَةِ لَيُسَمُّونَ ٱلْمَلَٰٓئِكَةَ تَسْمِيَةَ ٱلْأُنثَىٰ ﴿٢٨﴾

29. නමුත් ඔවුන්ට ඒ පිළිබඳව කිසිදු දැනුමක් නොමැත. ඔවුන් අනුගමනය කරන්නේ අනුමානය මිස නැත. නියතවශයෙන්ම සත්‍යයට එරෙහිව අනුමානය කිසිම ඵලක් නොවන්නේය.

وَمَا لَهُم بِهِۦ مِنْ عِلْمٍ ۖ إِن يَتَّبِعُونَ إِلَّا ٱلظَّنَّ ۖ وَإِنَّ ٱلظَّنَّ لَا يُغْنِى مِنَ ٱلْحَقِّ شَيْـًٔا ﴿٢٩﴾

30. එබැවින් අප සිහිකිරීමෙන් වැලකී සිටින එමෙන්ම මෙලොව ජීවිතය පමණක් පතන අයගෙන් ඉවත් වන්න.

فَأَعْرِضْ عَن مَّن تَوَلَّىٰ عَن ذِكْرِنَا وَلَمْ يُرِدْ إِلَّا ٱلْحَيَوٰةَ ٱلدُّنْيَا ﴿٣٠﴾

31. ඔවුන්ගේ දැනුමෙහි උපරිමය එය වේ. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්, ඔහුගේ මාර්ගයෙන් නොමග යන අයව මැනවින් දන්නේය. එමෙන්ම මගපෙන්වීම අනුගමනය කරන අයවද ඔහු මැනැවින් දන්නේය.

ذَٰلِكَ مَبْلَغُهُم مِّنَ ٱلْعِلْمِ ۚ إِنَّ رَبَّكَ هُوَ أَعْلَمُ بِمَن ضَلَّ عَن سَبِيلِهِۦ وَهُوَ أَعْلَمُ بِمَنِ ٱهْتَدَىٰ ﴿٣١﴾

32. තවද අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද අල්ලාහ්ට අයත්ය. එහෙයින් නපුරුකම් කළ අයට ඔවුන් කළ දේ අනුව ඔහු ඔවුනට ප්‍රතිවිපාක

وَلِلَّهِ مَا فِى ٱلسَّمَٰوَٰتِ وَمَا فِى ٱلْأَرْضِ لِيَجْزِىَ ٱلَّذِينَ أَسَٰٓـُٔوا۟ بِمَا عَمِلُوا۟ وَيَجْزِىَ

الَّذِينَ أَحْسَنُوا بِالْحُسْنَى ۝٣٢

දෙන්නේය. තවද යහපත් ක්‍රියා කළ අය හට විශිෂ්ඨ දෙයින් ඔහු ඔවුනට තිළිණය දෙන්නේය.

الَّذِينَ يَجْتَنِبُونَ كَبَائِرَ الْإِثْمِ وَالْفَوَاحِشَ إِلَّا اللَّمَمَ ۚ إِنَّ رَبَّكَ وَاسِعُ الْمَغْفِرَةِ ۚ هُوَ أَعْلَمُ بِكُمْ إِذْ أَنْشَأَكُمْ مِنَ الْأَرْضِ وَإِذْ أَنْتُمْ أَجِنَّةٌ فِي بُطُونِ أُمَّهَاتِكُمْ ۖ فَلَا تُزَكُّوا أَنْفُسَكُمْ ۖ هُوَ أَعْلَمُ بِمَنِ اتَّقَىٰ ۝٣٣

33. (මෙම යහපත් ක්‍රියා කරන්නන් ගත්කල) ඔවුන් සුළු අතපසුවීම් හැර මහා පාපයන්ගෙන්ද අවිනීත හැසිරීම් වලින්ද වැළකී සිටින්නෝය. ඔබගේ අධිපතියාණන් ඇත්තෙන්ම අසීමිතව සමාව දෙන්නාය. ඔහු නුඹලාව පොළොවෙන් මැවූ කල්හිද නුඹලා නුඹලාගේ මව්වරුන්ගේ කුස් තුල කලලයන්ව සිටි කල්හිද ඔහු නුඹලා ගැන ඉතා මැනවින් දන්නේය. එබැවින් නුඹලා පරිශුද්ධ යැයි තමන්ටම ආරෝපණය කර නොගනු. (සැබෑ) බියබැතිමතුන් කවුරුන්දැයි ඔහු ඉතා මැනැවින් දන්නේය.

أَفَرَأَيْتَ الَّذِي تَوَلَّىٰ ۝٣٤

34. ඉවත හැරෙන්නාවූ ඔහුව ඔබ දුටුවෙහිද?

وَأَعْطَىٰ قَلِيلًا وَأَكْدَىٰ ۝٣٥

35. තවද ඔහු ස්වල්පයක් දී මසුරුකම් කරන්නේද?

أَعِنْدَهُ عِلْمُ الْغَيْبِ فَهُوَ يَرَىٰ ۝٣٦

36. අදෘෂ්‍යමාන දේහි දැනුම ඔහුට තිබී, ඔහු එයින් දකින්නේද?

أَمْ لَمْ يُنَبَّأْ بِمَا فِي صُحُفِ مُوسَىٰ ۝٣٧

37. මූසාගේ දේව ලියවිලි පිළිබඳව ඔහුට නොදන්වන ලද්දේද?

وَإِبْرَاهِيمَ الَّذِي وَفَّىٰ ۝٣٨

38. එමෙන්ම (නියෝගයන්) ඉටු කළාවූ ඉබ්රාහීම් පිළිබඳවද?

أَلَّا تَزِرُ وَازِرَةٌ وِزْرَ أُخْرَىٰ ۝٣٩

39. එනම් බර උසුලන කිසිම කෙනෙක් අනෙකාගේ බර නොඋසුලන්නේය.

وَأَنْ لَيْسَ لِلْإِنْسَانِ إِلَّا مَا سَعَىٰ ۝٤٠

40. තවද මිනිසාට ඔහු උත්සාහ කළ දේ මිස අන් කිසිවක් (ඵලදායි) නොවන්නේය.

وَأَنَّ سَعْيَهُ سَوْفَ يُرَىٰ ۝٤١

41. තවද ඔහුගේ උත්සාහය සැනෙකින්ම පිළිගනු ලබන්නේය.

ثُمَّ يُجْزٰىهُ الْجَزَآءَ الْاَوْفٰى ۙ﴿٤٢﴾

42. පසුව ඔහුට එය සඳහා පරිපූර්ණව තිළිණ දෙනු ලබන්නේය.

وَاَنَّ اِلٰى رَبِّكَ الْمُنْتَهٰى ۙ﴿٤٣﴾

43. තවද අවසාන පැමිණීම ඔබගේ අධිපතියාණන් වෙතටය.

وَاَنَّهٗ هُوَ اَضْحَكَ وَاَبْكٰى ۙ﴿٤٤﴾

44. තවද (මිනිසුන්ව) සිනාසීමට සලස්වන්නෙත් එමෙන්ම (ඔවුන්ව) ඇඬීමට සලස්වන්නෙත් ඔහුමය.

وَاَنَّهٗ هُوَ اَمَاتَ وَاَحْيَا ۙ﴿٤٥﴾

45. තවද මරණයට පමුණුවන්නේත් එමෙන්ම ජීවය දෙන්නේත් ඔහුමය.

وَاَنَّهٗ خَلَقَ الزَّوْجَيْنِ الذَّكَرَ وَالْاُنْثٰى ۙ﴿٤٦﴾

46. තවද ස්ත්‍රී සහ පුරුෂ යන යුගලය මැව්වේද ඔහුමය.

مِنْ نُّطْفَةٍ اِذَا تُمْنٰى ۪﴿٤٧﴾

47. විමෝචනය කරනු ලැබූ ශුක්‍ර බිඳුවකින්ද(මැව්වේ ඔහුමය).

وَاَنَّ عَلَيْهِ النَّشْاَةَ الْاُخْرٰى ۙ﴿٤٨﴾

48. නැවත මැවීමද ඔහු කෙරෙහිය.

وَاَنَّهٗ هُوَ اَغْنٰى وَاَقْنٰى ۙ﴿٤٩﴾

49. තවද (කෙනෙකුට තෘප්තිය සඳහා) ධනවත් කරවන්නේත් වස්තූන් ලබා දෙන්නේත් ඔහුමය.

وَاَنَّهٗ هُوَ رَبُّ الشِّعْرٰى ۙ﴿٥٠﴾

50. තවද 'ෂිඃරා' (නම් තරුවෙ)හි අධිපතියාණන් ඔහුමය.

وَاَنَّهٗۤ اَهْلَكَ عَادَا ۨالْاُوْلٰى ۙ﴿٥١﴾

51. තවද පළමු ආද්(ගේ ගෝත්‍රය) විනාශ කළේ ඔහුමය.

وَثَمُوْدَا۟ فَمَاۤ اَبْقٰى ۙ﴿٥٢﴾

52. තවද සමුද්(ගේ ගෝත්‍රිකයින්)වද, (ඔවුන්ගේ කිසිවෙකුත්) ඔහු ඉතිරි නොකළේය.

وَقَوْمَ نُوْحٍ مِّنْ قَبْلُ ؕ اِنَّهُمْ كَانُوْا هُمْ اَظْلَمَ وَاَطْغٰى ؕ﴿٥٣﴾

53. තවද (ඔවුන්ට) පෙර නූහ්ගේ ජනතාවද (ඔහු විනාශ කළේය). සැබැවින්ම ඔවුන් ඉතා අදමිටුද ඉතා කළහකාරීද වූහ.

وَالْمُؤْتَفِكَةَ اَهْوٰى ۙ﴿٥٤﴾

54. තවද (ලූත්ගේ ජනතාවගේ) උඩුයටිකුරු කරන ලද ජනාවාසයන් ඔහු වනසා දැම්මේය.

فَغَشّٰىهَا مَا غَشّٰى ۚ﴿٥٥﴾

55. එබැවින් වෙළාගන්නට තිබුණු දේ ඔවුන්ව වෙළාගත්තේය.

56. (එම්බා මිනිසා!) එසේ නම් නුඹගේ අධිපතියාණන්ගේ කුමන වරප්‍රසාදයන් පිළිබඳව නුඹ වාද කරන්නෙහිද ?

فَبِأَيِّ آلَاءِ رَبِّكَ تَتَمَارَىٰ ٥٦

57. මොහු පෙර විසූ අවවාද කරුවන්ගෙන් අවවාද කරුවෙකි.

هَٰذَا نَذِيرٌ مِّنَ النُّذُرِ الْأُولَىٰ ٥٧

58. පැමිණීමට නියමිත (හෝරාව) සමීප වී ඇත.

أَزِفَتِ الْآزِفَةُ ٥٨

59. අල්ලාහ් හැර කිසිවෙකුටත් එය වැළැක්විය නොහැක.

لَيْسَ لَهَا مِن دُونِ اللَّهِ كَاشِفَةٌ ٥٩

60. එසේනම් නුඹලා මෙම සන්දේශය පිළිබඳව මවිතයට පත්වන්නෙහුද?

أَفَمِنْ هَٰذَا الْحَدِيثِ تَعْجَبُونَ ٦٠

61. තවද නුඹලා සිනාසෙන්නෙහුය, නොවැළපෙන්නෙහුද?

وَتَضْحَكُونَ وَلَا تَبْكُونَ ٦١

62. තවද නුඹලා උඩඟුවෙන් නොසැලකිලිමත් වන්නෙහුද?

وَأَنتُمْ سَامِدُونَ ٦٢

63. එබැවින් නුඹලා අල්ලාහ් ඉදිරියෙහි නළල බිම තබා නමස්කාරය කරනු. තවද (ඔහුට) නමදිනු.

فَاسْجُدُوا لِلَّهِ وَاعْبُدُوا ۩ ٦٣



අල් කමර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِقۡتَرَبَتِ السَّاعَةُ وَانۡشَقَّ الۡقَمَرُ ②

2. හෝරාව සමීප වී ඇත්තේය. තවද සඳ දෙපළු විය.

وَاِنۡ يَّرَوۡا اٰيَةً يُّعۡرِضُوۡا وَيَقُوۡلُوۡا سِحۡرٌ مُّسۡتَمِرٌّ ③

3. තවද ඔවුන් සළකුණක් දකින විට ඉවත හැරෙමින්, '(මෙය) නිරතුරුවම පවතින්නාවූ මායාවකි'යි පවසන්නෝය

وَكَذَّبُوۡا وَاتَّبَعُوۡۤا اَهۡوَآءَهُمۡ وَكُلُّ اَمۡرٍ مُّسۡتَقِرٌّ ④

4. ඔවුන් (සත්‍යය) බොරු යැයි සළකා ඔවුන්ගේම සිතැඟියාවන් අනුගමනය කරන්නෝය. නමුත් (දෙවියන්ගේ) සෑම නියමයක්ම සිදුවනු නියතය.

وَلَقَدۡ جَآءَهُمۡ مِّنَ الۡاَنۡۢبَآءِ مَا فِيۡهِ مُزۡدَجَرٌ ۙ⑤

5. තවද දැඩි අනතුරු ඇඟවීමකින් යුත් ආරංචීන් දැනටමත් ඔවුන් වෙතට පැමිණ ඇත.

حِكۡمَةٌۢ بَالِغَةٌ فَمَا تُغۡنِ النُّذُرُ ۙ⑥

6. (ඒවා) පරිපූර්ණ ඥානයෙන් යුක්ත විය. එහෙත් ඒ අනතුරු ඇඟවීම් ඔවුනට ඵලක් නොවීය.

فَتَوَلَّ عَنۡهُمۡ‌ۘ يَوۡمَ يَدۡعُ الدَّاعِ اِلٰى شَىۡءٍ نُّكُرٍ ۙ⑦

7. එමනිසා ඔබ ඔවුන්ගෙන් ඉවත් වෙන්න. කැඳවන්නෙක් (ඔවුනට) එකඟ විය නොහැකි දේ වෙත කැඳවන්නා වූ එදින,

خُشَّعًا اَبۡصَارُهُمۡ يَخۡرُجُوۡنَ مِنَ الۡاَجۡدَاثِ كَاَنَّهُمۡ جَرَادٌ مُّنۡتَشِرٌ ۙ⑧

8. ඔවුන්ගේ ඇස් පහතට හෙළී තිබෙනු ඇත. ඔවුන් විසිරුණු පළඟැටියන් මෙන් (ඔවුන්ගේ) සොහොන්වලින් පිටතට පැමිණ,

مُّهۡطِعِيۡنَ اِلَى الدَّاعِ‌ؕ يَقُوۡلُ الۡكٰفِرُوۡنَ هٰذَا يَوۡمٌ عَسِرٌ ⑨

9. කැඳවන්නා වෙත යුහුසුළුව දිව යන්නෝය. අවිශ්වාසීතයින්, 'මෙය ඉතා දුෂ්කර දිනයකි'යි කියන්නෝය.

10. ඔවුන්ට පෙර නූහ්ගේ ජනතාවද (සත්‍යය) බොරුවක් යැයි සැළකූහ. පසුව ඔවුන් අපගේ දාසයාව ප්‍රතික්ෂේප කළෝය. 'උම්මත්තකයෙක්, පලවා හරින ලද්දෙක්'යැයිද පැවසූහ.

كَذَّبَتْ قَبْلَهُمْ قَوْمُ نُوحٍ فَكَذَّبُوا عَبْدَنَا وَقَالُوا مَجْنُونٌ وَازْدُجِرَ ۝١٠

11. එබැවින් ඔහු ඔහුගේ අධිපතියාණන්ගෙන්, 'මා පරාජිත වූයෙමි. එහෙයින් මාගේ උදව්වට ඔබ පැමිණෙනු මැනව!'යි අයැදීය.

فَدَعَا رَبَّهُ أَنِّي مَغْلُوبٌ فَانْتَصِرْ ۝١١

12. ඉන්පසු අපි නොකඩවා ඇද හැලෙන්නා වූ ජලය මගින් අහස්හි දොරටු විවෘත කළෙමු.

فَفَتَحْنَا أَبْوَابَ السَّمَاءِ بِمَاءٍ مُنْهَمِرٍ ۝١٢

13. තවද අපි දිය උල්පත් පොළොව පැලී උතුරා යැමට සැලැස්වූවෙමු. පසුව (දෙආකාර) ජල දහරාවන් නියම කරන ලද අරමුණක් සඳහා එක්විය.

وَفَجَّرْنَا الْأَرْضَ عُيُونًا فَالْتَقَى الْمَاءُ عَلَىٰ أَمْرٍ قَدْ قُدِرَ ۝١٣

14. තවද ලී සහ ඇණ වලින් සමන්විත (නැවක්) මත අපි ඔහුව ඉසිලියෙමු.

وَحَمَلْنَاهُ عَلَىٰ ذَاتِ أَلْوَاحٍ وَدُسُرٍ ۝١٤

15. අපගේ ඇස් ඉදිරියෙහි එය පාවී ගියේය. ප්‍රතික්ෂේප කරනු ලැබූවන්ට (එය) තිළිණයකි.

تَجْرِي بِأَعْيُنِنَا جَزَاءً لِمَنْ كَانَ كُفِرَ ۝١٥

16. තවද අපි එය (මතු පරපුරට) සළකුණක් වශයෙන් ඉතිරිව තැබුවෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද?

وَلَقَدْ تَرَكْنَاهَا آيَةً فَهَلْ مِنْ مُدَّكِرٍ ۝١٦

17. පසුව මාගේ දඬුවම සහ මාගේ අණතුරු ඇඟවීම් කෙසේ (දරුණු) වීද?

فَكَيْفَ كَانَ عَذَابِي وَنُذُرِ ۝١٧

18. තවද අපි ඇත්තෙන්ම කුර්ආනය (වටහාගැනීමටද) සිහිකිරීමටද සරල කර ඇත්තෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද?

وَلَقَدْ يَسَّرْنَا الْقُرْآنَ لِلذِّكْرِ فَهَلْ مِنْ مُدَّكِرٍ ۝١٨

كَذَّبَتْ عَادٌ فَكَيْفَ كَانَ عَذَابِي وَنُذُرِ ١٩

19. ආද්ගේ (ගෝත්‍රිකයින්ද සත්‍යය) බොරුවක් යැයි සැලකූහ. පසුව මාගේ දඬුවම සහ මාගේ අණතුරු ඇඟවීම් කෙසේ (දරුණු) විද?

إِنَّا أَرْسَلْنَا عَلَيْهِمْ رِيحًا صَرْصَرًا فِي يَوْمِ نَحْسٍ مُّسْتَمِرٍّ ٢٠

20. කෙලවරක් නැති අවාසනාවන්ත දිනයකදී නියතවශයෙන්ම අපි ඔවුන්ට එරෙහිව වේගවත් සුළි සුළඟක් එව්වෙමු.

تَنزِعُ النَّاسَ كَأَنَّهُمْ أَعْجَازُ نَخْلٍ مُّنقَعِرٍ ٢١

21. එය මුලිනුපුටා දමන ලද රටඉඳි ගස් කඳන් මෙන්, මිනිසුන්ව වැරෙන් විසි කළේය.

فَكَيْفَ كَانَ عَذَابِي وَنُذُرِ ٢٢

22. පසුව මාගේ දඬුවම සහ මාගේ අණතුරු ඇඟවීම් කෙසේ (දරුණු) විද?

وَلَقَدْ يَسَّرْنَا الْقُرْآنَ لِلذِّكْرِ فَهَلْ مِن مُّدَّكِرٍ ٢٣

23. තවද අපි ඇත්තෙන්ම කුර්ආනය (වටහාගැනීමටද) සිහිකිරීමටද සරල කර ඇත්තෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද?

كَذَّبَتْ ثَمُودُ بِالنُّذُرِ ٢٤

24. සමුද්(ගේ ගෝත්‍රිකයින්)ද අවවාද කරුවන්ව බොරු යැයි සැලකූහ.

فَقَالُوا أَبَشَرًا مِّنَّا وَاحِدًا نَّتَّبِعُهُ إِنَّا إِذًا لَّفِي ضَلَالٍ وَسُعُرٍ ٢٥

25. පසුව ඔවුන් (මෙසේ) පැවසූහ. 'කිමද! අප අතරින් වූ මිනිසෙක්ව! තනි පුද්ගලයෙක්ව! අප ඔහුව අනුගමනය කළ යුතුද? එසේ නම් අප ඇත්තෙන්ම ප්‍රකට වරදෙහිද උමතුවෙහිද වනු ඇත'.

أَأُلْقِيَ الذِّكْرُ عَلَيْهِ مِن بَيْنِنَا بَلْ هُوَ كَذَّابٌ أَشِرٌ ٢٦

26. 'අප සියල්ලන්ගෙන්ම ඔහුට (පමණක්)ද අනුශාසනාව දෙනු ලැබුවේ? නොඑසේය, ඔහු පුරසාරම් දොඩන මුසාවාදියෙක්!' (යැයිද පැවසූහ).

سَيَعْلَمُونَ غَدًا مَّنِ الْكَذَّابُ الْأَشِرُ ٢٧

27. (අපි මෙසේ පැවසුවෙමු). 'පුරසාරම් දොඩන මුසාවාදියා කවුරුන්දැයි හෙට දිනයේදී නිශ්චිතවම ඔවුන් දැනගන්නෝය.'

إِنَّا مُرْسِلُو النَّاقَةِ فِتْنَةً لَّهُمْ

28. 'ඇත්තෙන්ම අපි ඔවුනට පිරික්සුමක් ලෙස ඔටු දෙනක්

فَارْتَقِبْهُمْ وَاصْطَبِرْ ﴿٢٨﴾

එවන්නෙමු. එබැවින් (එම්බල සාලිහ්) ඔබ ඔවුන් ගැන පරික්ෂාකාරී වී ඉවසා සිටින්න.'

وَنَبِّئْهُمْ اَنَّ الْمَآءَ قِسْمَةٌۢ بَيْنَهُمْ ۚ كُلُّ شِرْبٍ مُّحْتَضَرٌ ﴿٢٩﴾

29. 'තවද, ඔවුනට මෙසේ දන්වන්න. ඔවුන් අතර ජලය බෙදා දෙනු ලැබ ඇත. සෑම පිරිසක්ම තමතමන්ගේ පානිය වේලාවන්හි සහභාගි විය යුතුය.'

فَنَادَوْا صَاحِبَهُمْ فَتَعَاطٰى فَعَقَرَ ﴿٣٠﴾

30. එහෙයින් ඔවුන් ඔවුන්ගේ සගයාව කැඳවූහ. තවද, ඔහු (ඔටු දෙනව) සමබරව අල්ලා ගෙන (ඌගේ) කලවේ නහරය කැපුවේය.

فَكَيْفَ كَانَ عَذَابِىْ وَنُذُرِ ﴿٣١﴾

31. පසුව මාගේ දඬුවම සහ මාගේ අණතුරු ඇඟවීම් කෙසේ (දරුණු) විද?

اِنَّآ اَرْسَلْنَا عَلَيْهِمْ صَيْحَةً وَّاحِدَةً فَكَانُوْا كَهَشِيْمِ الْمُحْتَظِرِ ﴿٣٢﴾

32. නියතවශයෙන්ම අපි ඔවුනට එරෙහිව එකම ගිගුරුම් හඬක් එව්වෙමු. තවද, ඔවුන් පාගන ලද වියළි පිදුරු බඳු වූහ.

وَلَقَدْ يَسَّرْنَا الْقُرْاٰنَ لِلذِّكْرِ فَهَلْ مِنْ مُّدَّكِرٍ ﴿٣٣﴾

33. තවද, අපි ඇත්තෙන්ම කුර්ආනය (වටහාගැනීමටද) සිහිකිරීමටද සරල කර ඇත්තෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද?

كَذَّبَتْ قَوْمُ لُوْطٍ بِالنُّذُرِ ﴿٣٤﴾

34. ලූත්ගේ ජනතාවද අවවාද කරුවන්ව බොරු යැයි සැලකූහ.

اِنَّآ اَرْسَلْنَا عَلَيْهِمْ حَاصِبًا اِلَّآ اٰلَ لُوْطٍ ؕ نَجَّيْنٰهُمْ بِسَحَرٍ ﴿٣٥﴾

35. නියතවශයෙන්ම අපි ඔවුන් මත ගල් වරුසාවක් එව්වෙමු. ලූත්ගේ පවුල හැරය. අපි ඔවුන්ව හිමිදිරියේදීම මුදවාගත්තෙමු.

نِّعْمَةً مِّنْ عِنْدِنَا ؕ كَذٰلِكَ نَجْزِىْ مَنْ شَكَرَ ﴿٣٦﴾

36. එය අප වෙතින් වූ අනුග්‍රහයක් වශයෙනි. මෙලෙස අපි කෘතඥ වන්නන්හට තිළිණ දෙන්නෙමු.

وَلَقَدْ اَنْذَرَهُمْ بَطْشَتَنَا فَتَمَارَوْا بِالنُّذُرِ ﴿٣٧﴾

37. තවද, ඔහු ඇත්තෙන්ම අපගේ දඬුවම පිළිබඳව ඔවුනට අනතුරු අඟවා ඇත්තේය. නමුත් ඔවුන් අනතුරු ඇඟවීම් ගැන සැකයෙන් පසු වූහ.

| | |
|---|---|
| 38. තවද ඔවුහු ඔහුගේ අමුත්තන්ගෙන් ඔහුව (වංචනිකව) පොළඹවා ගන්නට තැත් කළහ. එබැවින් අපි ඔවුන්ගේ ඇස් අන්ධ කළෙමු. පසුව 'මාගේ දඬුවම සහ මාගේ අනතුරු ඇඟවීම් දැන් විඳිනු'යි (පැවසුවෙමු). | وَلَقَدْ رَاوَدُوهُ عَن ضَيْفِهِۦ فَطَمَسْنَآ أَعْيُنَهُمْ فَذُوقُوا۟ عَذَابِى وَنُذُرِ ﴿٣٨﴾ |
| 39. තවද උදෑසනම ඔවුන් වෙතට ස්ථිර වන්නාවූ දඬුවමක් නිශ්චිතවම පැමිණියේය. | وَلَقَدْ صَبَّحَهُم بُكْرَةً عَذَابٌ مُّسْتَقِرٌّ ﴿٣٩﴾ |
| 40. 'එබැවින් මාගේ දඬුවම සහ මාගේ අනතුරු ඇඟවීම් දැන් විඳිනු.' | فَذُوقُوا۟ عَذَابِى وَنُذُرِ ﴿٤٠﴾ |
| 41. තවද අපි ඇත්තෙන්ම කුර්ආනය (වටහාගැනීමටද) සිහිකිරීමටද සරල කර ඇත්තෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද? | وَلَقَدْ يَسَّرْنَا ٱلْقُرْءَانَ لِلذِّكْرِ فَهَلْ مِن مُّدَّكِرٍ ﴿٤١﴾ |
| 42. තවද නියතවශයෙන්ම ෆිර්අවුන්ගේ ජනතාව වෙතටද අවවාදකරුවන් පැමිණියහ. | وَلَقَدْ جَآءَ ءَالَ فِرْعَوْنَ ٱلنُّذُرُ ﴿٤٢﴾ |
| 43. ඔවුන් අපගේ සියළු සළකුණු ප්‍රතික්ෂේප කළහ. එබැවින් ප්‍රඥාසම්පන්න සහ සර්ව බලධාරියාගේ ග්‍රහණය මෙන් අපි ඔවුන්ව ග්‍රහණය කරගත්තෙමු. | كَذَّبُوا۟ بِـَٔايَٰتِنَا كُلِّهَا فَأَخَذْنَٰهُمْ أَخْذَ عَزِيزٍ مُّقْتَدِرٍ ﴿٤٣﴾ |
| 44. ඔවුන්ට වඩා නුඹලාගේ (මෙකල සිටින) අවිශ්වාසිතයින් ශ්‍රේෂ්ඨද? නොඑසේනම් දේව ලියවිල්ලෙහි නුඹලාට මිදීමක් ඇත්තේද? | أَكُفَّارُكُمْ خَيْرٌ مِّنْ أُو۟لَٰٓئِكُمْ أَمْ لَكُم بَرَآءَةٌ فِى ٱلزُّبُرِ ﴿٤٤﴾ |
| 45. ඔවුහු, 'අපි ජයග්‍රාහක සේනාවක් වෙමු'යි පවසන්නෝද? | أَمْ يَقُولُونَ نَحْنُ جَمِيعٌ مُّنتَصِرٌ ﴿٤٥﴾ |
| 46. එම සේනාවන් හනිකවම පරාජය කරනු ලබන්නේය. තවද ඔවුන් පිටුපා (පලා යෑමට) සලස්වනු ලබන්නේය. | سَيُهْزَمُ ٱلْجَمْعُ وَيُوَلُّونَ ٱلدُّبُرَ ﴿٤٦﴾ |
| 47. එසේය! එම හෝරාව ඔවුන්ගේ (පරාජය) නියම කරන ලද වේලාවයි. තවද එම හෝරාව ඉතා ඛේදවාචකය. තවද ඉතාමත් තිත්තය. | بَلِ ٱلسَّاعَةُ مَوْعِدُهُمْ وَٱلسَّاعَةُ أَدْهَىٰ وَأَمَرُّ ﴿٤٧﴾ |

إِنَّ الْمُجْرِمِينَ فِي ضَلَالٍ وَسُعُرٍ ﴿٤٨﴾

48. නියතවශයෙන්ම වැරදිකරුවන් (ප්‍රත්‍යක්ෂ) නොමගහිය. තවද උමතු බවෙහිය.

يَوْمَ يُسْحَبُونَ فِي النَّارِ عَلَىٰ وُجُوهِهِمْ ذُوقُوا مَسَّ سَقَرَ ﴿٤٩﴾

49. ඔවුන්ව මුණින් අතට ගින්න වෙතට ඇදගෙන යනු ලබන එදිනෙහි, 'නිරයෙහි (දැඩුවම) භුක්ති විඳිනු'(යි ඔවුන්ට කියනු ලබන්නේය.)

إِنَّا كُلَّ شَيْءٍ خَلَقْنَاهُ بِقَدَرٍ ﴿٥٠﴾

50. සැබැවින්ම සියළු දේ (එයට අනුකූල) ප්‍රමාණයෙන් අපි මවා ඇත්තෙමු.

وَمَا أَمْرُنَا إِلَّا وَاحِدَةٌ كَلَمْحٍ بِالْبَصَرِ ﴿٥١﴾

51. තවද අපගේ විධානය එකවර ඇසිපිය හෙලන්නාක් මෙන්ය.

وَلَقَدْ أَهْلَكْنَا أَشْيَاعَكُمْ فَهَلْ مِن مُّدَّكِرٍ ﴿٥٢﴾

52. තවද ඇත්තෙන්ම අපි (නුඹලාට පෙර) නුඹලා මෙන් ජනතාව විනාශ කර ඇත්තෙමු. එසේනම් අනුශාසනා ලබන කිසිවෙක්වත් සිටින්නේද?

وَكُلُّ شَيْءٍ فَعَلُوهُ فِي الزُّبُرِ ﴿٥٣﴾

53. තවද ඔවුන් කළ සියළු දේ ලියවිලිවල (සඳහන්)ය.

وَكُلُّ صَغِيرٍ وَكَبِيرٍ مُّسْتَطَرٌ ﴿٥٤﴾

54. තවද කුඩා වුත් විශාල වුත් සියළු දේ ලියවී ඇත.

إِنَّ الْمُتَّقِينَ فِي جَنَّاتٍ وَنَهَرٍ ﴿٥٥﴾

55. සැබැවින්ම බියබැතිමතුන් උයන් සහ දියදහරාවන් අතරෙහි වනු ඇත.

فِي مَقْعَدِ صِدْقٍ عِندَ مَلِيكٍ مُّقْتَدِرٍ ﴿٥٦﴾

56. සර්වබලධාරී රාජයාණන්ගේ අභියස සත්‍යයේ අසුනෙහි (වනු ඇත).



අල් රහ්මාන්
(මක්කාහිදී පහළ වූවකි)

| | |
|---|---|
| 1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්. | بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾ |
| 2. මහා කාරුණික (දෙවි)යාණන්ය. | اَلرَّحۡمٰنُۙ ﴿٢﴾ |
| 3. කුර්ආනය උගන්වා ඇත්තේ ඔහුය. | عَلَّمَ الۡقُرۡاٰنَؕ ﴿٣﴾ |
| 4. මිනිසාව මවා ඇත්තේ ඔහුය. | خَلَقَ الۡاِنۡسَانَۙ ﴿٤﴾ |
| 5. ඔහුට වතුර කථිකත්වය ඉගැන්වූයේ ඔහුය. | عَلَّمَهُ الۡبَيَانَ ﴿٥﴾ |
| 6. සූර්යයා සහ චන්ද්‍රයා නියමිත කාලය අනුව (තමන්ගේ පථයන්හි ගමන් කරයි). | اَلشَّمۡسُ وَالۡقَمَرُ بِحُسۡبَانٍ ﴿٦﴾ |
| 7. තවද වැල් සහ ගස් (ඔහුගේ අණට නිහතමානිව) යටහත් වන්නේය. | وَّالنَّجۡمُ وَالشَّجَرُ يَسۡجُدٰنِ ﴿٧﴾ |
| 8. තවද ඔහු අහස ඉහලට ඔසවා නියමිත මිම්මක් තැබුවේය. | وَالسَّمَآءَ رَفَعَهَا وَوَضَعَ الۡمِيۡزَانَۙ ﴿٨﴾ |
| 9. එය නුඹලා මිම්මෙන් සීමාව ඉක්මවා නොයෑමටය. | اَلَّا تَطۡغَوۡا فِى الۡمِيۡزَانِ ﴿٩﴾ |
| 10. එබැවින් (සියළු දේ) සාධාරණව කිරා දෙනු. තවද මැනීමෙහි අඩු නොකරනු. | وَاَقِيۡمُوا الۡوَزۡنَ بِالۡقِسۡطِ وَلَا تُخۡسِرُوا الۡمِيۡزَانَ ﴿١٠﴾ |
| 11. තවද (ඔහුගේ) මැවීම් සඳහා ඔහු පොළොව ඇති කළේය. | وَالۡاَرۡضَ وَضَعَهَا لِلۡاَنَامِۙ ﴿١١﴾ |
| 12. එහි (සියළු වර්ගයේ) පළතුරුද කෝෂවලින් යුතු රටඉඳි ගස්ද. | فِيۡهَا فَاكِهَةٌ ۙ وَّالنَّخۡلُ ذَاتُ الۡاَكۡمَامِ ۖ ﴿١٢﴾ |
| 13. තවද (එහි) පොතු සහිත ධාන්‍යද, සුවඳවත් පැළෑටිද (ඇත). | وَالۡحَبُّ ذُو الۡعَصۡفِ وَالرَّيۡحَانُ ۚ ﴿١٣﴾ |

| | |
|---|---|
| 14. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿١٤﴾ |
| 15. පිලිස්සූ වළං මෙන් හඬනගන වියළි මැටියෙන් ඔහු මිනිසා මැව්වේය. | خَلَقَ الْاِنْسَانَ مِنْ صَلْصَالٍ كَالْفَخَّارِ ﴿١٥﴾ |
| 16. තවද ජින්වරුන්ව ඔහු ගින්නෙහි දැල්ලෙන් මැව්වේය. | وَخَلَقَ الْجَآنَّ مِنْ مَّارِجٍ مِّنْ نَّارٍ ﴿١٦﴾ |
| 17. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿١٧﴾ |
| 18. (ඔහු) නැගෙනහිර දෙකෙහි අධිපතියාණන්ය, බටහිර දෙකෙහිද අධිපතියාණන්ය! | رَبُّ الْمَشْرِقَيْنِ وَرَبُّ الْمَغْرِبَيْنِ ﴿١٨﴾ |
| 19. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿١٩﴾ |
| 20. සැබැවින්ම ඔහු සයුරු දෙක සම්පව ඇති කළේය. ඒවා එක්වනු ඇත. | مَرَجَ الْبَحْرَيْنِ يَلْتَقِيٰنِ ﴿٢٠﴾ |
| 21. ඒ දෙක අතර (දැන්) බාධකයකි. ඒවා (එකිනෙක) ඉක්මවා යා නොහැක. | بَيْنَهُمَا بَرْزَخٌ لَّا يَبْغِيٰنِ ﴿٢١﴾ |
| 22. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٢٢﴾ |
| 23. ඒවායින් මුතුද පබළුද පිටවන්නේය. | يَخْرُجُ مِنْهُمَا اللُّؤْلُؤُ وَالْمَرْجَانُ ﴿٢٣﴾ |

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٢٤

24. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

وَلَهُ الْجَوَارِ الْمُنْشَئٰتُ فِى الْبَحْرِ كَالْاَعْلَامِ ۝٢٥

25. තවද මුහුදට ඉහළින් කඳුමෙන් (දිස්වන) උස්වූ නෞකාවන් ඔහුගේය.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٢٦

26. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

كُلُّ مَنْ عَلَيْهَا فَانٍ ۝٢٧

27. මෙහි (පොළොවෙහි) ඇති සියළු දේ වැනසී යනු ඇත.

وَّيَبْقٰى وَجْهُ رَبِّكَ ذُو الْجَلٰلِ وَالْاِكْرَامِ ۝٢٨

28. එමෙන්ම මහිමයෙහිද ගෞරවයෙහිද අධිපති වන ඔබගේ අධිපතියාණන්ගේ තෘප්තිය (පමණක්) සදා පවතිනු ඇත.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٢٩

29. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

يَسْـَٔلُهٗ مَنْ فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ كُلَّ يَوْمٍ هُوَ فِىْ شَاْنٍ ۝٣٠

30. අහස් සහ පොළොවෙහි ඇති සියල්ලන්ම ඔහුගෙන් අයැදින්නෝය. සෑම මොහොතකම ඔහු විවිධාකාර ස්වභාවයෙන් (තමාව හෙළි කරන්නේය).

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٣١

31. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

سَنَفْرُغُ لَكُمْ اَيُّهَ الثَّقَلٰنِ ۝٣٢

32. එම්බල මහා බලගතු දෙපිරිසනි! කඩිනමින්ම අපි නුඹලා වෙත පැමිණීමට සිටින්නෙමු.

| | |
|---|---|
| 33. එසේනම්, (එම්බල මිනිසුනි, පින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٣٣ |
| 34. එම්බල පින්වරුන්ගේ හා මිනිසුන්ගේ සමූහයිනි! අහස් සහ පොළොවෙහි සීමාවන් අභිබවා යන්නට නුඹලාට ශක්තියක් ඇත්නම්, අභිබවා යනු. නමුත් බලගතු සාධකයෙන් මිස නුඹලාට අභිබවා යා නොහැකිය. | يٰمَعْشَرَ الْجِنِّ وَالْاِنْسِ اِنِ اسْتَطَعْتُمْ اَنْ تَنْفُذُوْا مِنْ اَقْطَارِ السَّمٰوٰتِ وَالْاَرْضِ فَانْفُذُوْا ؕ لَا تَنْفُذُوْنَ اِلَّا بِسُلْطٰنٍ ۝٣٤ |
| 35. එසේනම්, (එම්බල මිනිසුනි, පින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٣٥ |
| 36. දුමාරයක් නැති ගිනි දැල්ලක්ද පැහැදිලි ගිනි දුමාරයක්ද නුඹලාට එරෙහිව එවනු ලබන්නේය. එවිට නුඹලා එකිනෙකාට උදව් කර ගැනීමට නොහැකි වනු ඇත. | يُرْسَلُ عَلَيْكُمَا شُوَاظٌ مِّنْ نَّارٍ ۙ وَّنُحَاسٌ فَلَا تَنْتَصِرٰنِ ۝٣٦ |
| 37. එසේනම්, (එම්බල මිනිසුනි, පින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٣٧ |
| 38. තවද අහස දෙපළු වී රක්ත වර්ණ සමක් සේ රතු පැහැ වන විට, | فَاِذَا انْشَقَّتِ السَّمَاۤءُ فَكَانَتْ وَرْدَةً كَالدِّهَانِ ۝٣٨ |
| 39. එසේනම්, (එම්බල මිනිසුනි, පින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද? | فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۝٣٩ |
| 40. එදින මිනිසාගෙන් හෝ පින්ගෙන් | فَيَوْمَىِٕذٍ لَّا يُسْـَٔلُ عَنْ ذَنْۢبِهٖۤ اِنْسٌ |

وَلَا جَآنٌّ ﴿٤٠﴾

හෝ තම පාපය ගැන ප්‍රශ්ණ කරනු නොලබන්නේය.

فَبِاَىِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٤١﴾

41. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

يُعْرَفُ الْمُجْرِمُوْنَ بِسِيْمٰهُمْ فَيُؤْخَذُ بِالنَّوَاصِىْ وَالْاَقْدَامِ ﴿٤٢﴾

42. වරදකරුවන් ඔවුන්ගේ සළකුණුවලින් හඳුනාගනු ලබන අතර ඔවුහු නළලේ කෙස් රොදින්ද පාද වලින්ද හසු කරනු ලබන්නෝය.

فَبِاَىِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٤٣﴾

43. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

هٰذِهٖ جَهَنَّمُ الَّتِىْ يُكَذِّبُ بِهَا الْمُجْرِمُوْنَ ﴿٤٤﴾

44. වරදකරුවන් ප්‍රතික්ෂේප කරමින් සිටි නිරය මෙය වේ.

يَطُوْفُوْنَ بَيْنَهَا وَبَيْنَ حَمِيْمٍ اٰنٍ ﴿٤٥﴾

45. ඔවුන් එය හා බිහිසුණුව උතුරන්නාවූ ජලය අතරින් සැරි සරන්නෝය.

فَبِاَىِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٤٦﴾

46. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

وَلِمَنْ خَافَ مَقَامَ رَبِّهٖ جَنَّتٰنِ ﴿٤٧﴾

47. නමුත් තම අධිපතියාණන්ගේ සන්නිධානයෙහි බිය දක්වන්නන්හට උද්‍යානයන් දෙකකි.

فَبِاَىِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٤٨﴾

48. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

ذَوَاتَاۤ اَفْنَانٍ ﴿٤٩﴾

49. ඒ දෙකම බොහෝ ශාඛා වලින් යුක්තය.

فَبِأَيِّ آلَاءِ رَبِّكُمَا تُكَذِّبَانِ ٥٠

50. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فِيهِمَا عَيْنَانِ تَجْرِيَانِ ٥١

51. ඒ දෙකෙහි (නිදහසේ) ගලායන දිය උල්පත් දෙකකි.

فَبِأَيِّ آلَاءِ رَبِّكُمَا تُكَذِّبَانِ ٥٢

52. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فِيهِمَا مِنْ كُلِّ فَاكِهَةٍ زَوْجَانِ ٥٣

53. ඒ දෙකෙහි සියළු (වර්ගයේ) පළතුරු ජෝඩු වශයෙන් තිබෙනු ඇත.

فَبِأَيِّ آلَاءِ رَبِّكُمَا تُكَذِّبَانِ ٥٤

54. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

مُتَّكِئِينَ عَلَىٰ فُرُشٍ بَطَائِنُهَا مِنْ إِسْتَبْرَقٍ ۚ وَجَنَى الْجَنَّتَيْنِ دَانٍ ٥٥

55. සියුම්ව ගෙත්තම් කරන ලද ඝන බුමුතුරුණු මත (වූ සයනයන්හි) ඔවුහු හාන්සි වී සිටින්නෝය. උද්‍යාන දෙකෙහි ඉදුණු පළතුරු ඔවුන් සමීපයෙහි බරවී තිබෙනු ඇත.

فَبِأَيِّ آلَاءِ رَبِّكُمَا تُكَذِّبَانِ ٥٦

56. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فِيهِنَّ قَاصِرَاتُ الطَّرْفِ لَمْ يَطْمِثْهُنَّ إِنْسٌ قَبْلَهُمْ وَلَا جَانٌّ ٥٧

57. එහි විනීත බැල්මෙන් යුත් (පතිවත රකින) ස්ත්‍රීන් වෙති. ඔවුන්ව, මොවුන්ට පෙර කිසිදු මිනිසෙකු හෝ ජින්කෙනෙකු හෝ ස්පර්ශ කර නැත්තේය.

فَبِأَيِّ آلَاءِ رَبِّكُمَا تُكَذِّبَانِ ٥٨

58. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

59. ඔවුන් රතු මැණික් සහ කුඩා මුතු මෙන්ය.

كَأَنَّهُنَّ ٱلْيَاقُوتُ وَٱلْمَرْجَانُ ﴿٥٩﴾

60. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فَبِأَيِّ ءَالَآءِ رَبِّكُمَا تُكَذِّبَانِ ﴿٦٠﴾

61. යහපත සඳහා තිළිණය යහපත මිස අන් දෙයක් තිබේද?

هَلْ جَزَآءُ ٱلْإِحْسَٰنِ إِلَّا ٱلْإِحْسَٰنُ ﴿٦١﴾

62. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فَبِأَيِّ ءَالَآءِ رَبِّكُمَا تُكَذِّبَانِ ﴿٦٢﴾

63. තවද මේ දෙකට අමතරව (තවත්) උද්‍යානයන් දෙකකි.

وَمِن دُونِهِمَا جَنَّتَانِ ﴿٦٣﴾

64. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فَبِأَيِّ ءَالَآءِ رَبِّكُمَا تُكَذِّبَانِ ﴿٦٤﴾

65. ඒ දෙක ඉතා හරිතය.

مُدْهَآمَّتَانِ ﴿٦٥﴾

66. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فَبِأَيِّ ءَالَآءِ رَبِّكُمَا تُكَذِّبَانِ ﴿٦٦﴾

67. ඒ දෙකෙහි ජලය පැන නගින්නාවූ දිය උල්පත් දෙකකි.

فِيهِمَا عَيْنَانِ نَضَّاخَتَانِ ﴿٦٧﴾

68. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فَبِأَيِّ ءَالَآءِ رَبِّكُمَا تُكَذِّبَانِ ﴿٦٨﴾

69. ඒ දෙකෙහි සියළු (වර්ගයේ) පළතුරුද රටඉඳිද දෙළුම්ද තිබෙනු ඇත.

فِيهِمَا فَٰكِهَةٌ وَنَخْلٌ وَرُمَّانٌ ﴿٦٩﴾

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۚ﴿٧٠﴾

70. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

فِيْهِنَّ خَيْرٰتٌ حِسَانٌ ۚ﴿٧١﴾

71. ඒවායෙහි යහපත් (හා) දැකුම්කළු (අප්සරාවන්)ය.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۚ﴿٧٢﴾

72. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

حُوْرٌ مَّقْصُوْرٰتٌ فِى الْخِيَامِ ۚ﴿٧٣﴾

73. කුටියන්හි මනාව ආරක්ෂා කරන ලද මනරම්‍ය කාල වර්ණ නෙත් සහිත සුරූපී අප්සරාවන්ය.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۚ﴿٧٤﴾

74. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

لَمْ يَطْمِثْهُنَّ اِنْسٌ قَبْلَهُمْ وَلَا جَآنٌّ ۚ﴿٧٥﴾

75. ඔවුන්ව, මොවුන්ට පෙර කිසිදු මිනිසෙකු හෝ ජින්කෙනෙකු හෝ ස්පර්ශ කර නැත්තේය.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ۚ﴿٧٦﴾

76. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

مُتَّكِـِٕيْنَ عَلٰى رَفْرَفٍ خُضْرٍ وَّعَبْقَرِيٍّ حِسَانٍ ۚ﴿٧٧﴾

77. (ඔවුන්) හරිතවර්ණ සයනයන්හිද අලංකාරවත් බුමුතුරුණු මතද හාන්සි වී සිටින්නෝය.

فَبِاَيِّ اٰلَاۤءِ رَبِّكُمَا تُكَذِّبٰنِ ﴿٧٨﴾

78. එසේනම්, (එම්බල මිනිසුනි, ජින්වරුනි!), නුඹලා දෙදෙනා නුඹලාගේ අධිපතියාණන්ගේ කුමන අනුග්‍රහයන් ප්‍රතික්ෂේප කරන්නෙහුද?

تَبٰرَكَ اسْمُ رَبِّكَ ذِى الْجَلٰلِ وَالْاِكْرَامِ ۧ﴿٧٩﴾

79. මහිමයටද ගෞරවයටද අධිපති වන ඔබගේ අධිපතියාණන්ගේ නාමය ආශිර්වාදයෙන් පරිපූර්ණය.




අල් වාකිආ
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِذَا وَقَعَتِ الْوَاقِعَةُ ②

2. වැදගත් සිදුවීමක් සිදුවන කල්හි,

لَيْسَ لِوَقْعَتِهَا كَاذِبَةٌ ③

3. එම සිදුවීමට කිසිදු ප්‍රතික්ෂේපයක් නොමැත.

خَافِضَةٌ رَّافِعَةٌ ④

4. සමහරුන්ව යටපත් කරමින්ද තවත් සමහරුන්ව උසස් කරමින්ද (එය සිදුවනු ඇත).

اِذَا رُجَّتِ الْاَرْضُ رَجًّا ⑤

5. පොළොව (භයානක) කම්පනයකින් සොලවනු ලබන කල්හි,

وَّبُسَّتِ الْجِبَالُ بَسًّا ⑥

6. තවද කඳු මුළුමනින්ම සුනු විසුණු කරනු ලබන්නේය.

فَكَانَتْ هَبَآءً مُّنْۢبَثًّا ⑦

7. එබැවින් ඒවා (සියල්ල) විසිරුණු දූවිලි අංශු මෙන් පත්වනු ඇත.

وَّكُنْتُمْ اَزْوَاجًا ثَلٰثَةً ⑧

8. තවද නුඹලා කණ්ඩායම් තුනක්ව බෙදී සිටින්නෙහුය.

فَاَصْحٰبُ الْمَيْمَنَةِ مَآ اَصْحٰبُ الْمَيْمَنَةِ ⑨

9. (පළමුවැන්න) දකුණු පසෙහි සිටින්නන්ය. දකුණු පසෙහි සිටින්නන් කවුරුන්ද?

وَاَصْحٰبُ الْمَشْئَمَةِ مَآ اَصْحٰبُ الْمَشْئَمَةِ ⑩

10. (දෙවැන්න), වම් පසෙහි සිටින්නන්ය. වම් පසෙහි සිටින්නන් කවුරුන්ද?

وَالسّٰبِقُوْنَ السّٰبِقُوْنَ ⑪

11. (තෙවැන්න, විශ්වාසයෙහිද ක්‍රියාවෙහිද) ප්‍රමුඛව සිටින්නන්ය. ඔවුන් ප්‍රමුඛව සිටින්නන්ම වෙති.

اُولٰٓئِكَ الْمُقَرَّبُوْنَ ⑫

12. (දෙවියන්ගේ) සමීපත්වය අත්කර ගන්නන් ඔවුන්මය.

فِيْ جَنّٰتِ النَّعِيْمِ ⑬

13. (ඔවුන්) ආශිර්වාදයෙන් යුත් උද්‍යානයන්හි (වෙසෙන්නන්)ය.

14. පෙර වූ ජනතාව අතුරින් මහා පිරිසකි.

ثُلَّةٌ مِّنَ الْأَوَّلِينَ ﴿١٤﴾

15. තවද පසු කාලීන ජනතාව අතුරින් සුළු පිරිසකි.

وَقَلِيلٌ مِّنَ الْآخِرِينَ ﴿١٥﴾

16. (රන් හා මැණික් වලින්) ගෙත්තම් කරන ලද සෝපාවන්හි (අසුන් ගෙන),

عَلَىٰ سُرُرٍ مَّوْضُونَةٍ ﴿١٦﴾

17. ඒ මත එකිනෙකාට මුහුණලා හාන්සි වී සිටින්නෝය.

مُّتَّكِئِينَ عَلَيْهَا مُتَقَابِلِينَ ﴿١٧﴾

18. සදාකාලීන තරුණයින් ඔවුන් වටා (ආවතේව කරමින්) සිටින්නෝය.

يَطُوفُ عَلَيْهِمْ وِلْدَانٌ مُّخَلَّدُونَ ﴿١٨﴾

19. ගුරුලේත්තුද කොතළද ගලායන උල්පතින් (පුරවාගත්) බඳුන්ද රැගෙන (ආවතේව කරන්නෝය).

بِأَكْوَابٍ وَأَبَارِيقَ وَكَأْسٍ مِّن مَّعِينٍ ﴿١٩﴾

20. ඒවා ඔවුනට හිසරදයක්ද ගෙන නොදෙන්නේය. තවද ඔවුනට මත්වීමක්ද නොවන්නේය.

لَّا يُصَدَّعُونَ عَنْهَا وَلَا يُنزِفُونَ ﴿٢٠﴾

21. ඔවුන් තෝරා ගන්නා පළතුරුද (රැගෙන),

وَفَاكِهَةٍ مِّمَّا يَتَخَيَّرُونَ ﴿٢١﴾

22. තවද ඔවුන්ගේ කැමැත්ත අනුව පක්ෂීන්ගේ මාංශද (රැගෙන එන්නෝය).

وَلَحْمِ طَيْرٍ مِّمَّا يَشْتَهُونَ ﴿٢٢﴾

23. තවද විස්මිත අලංකාර වූ නෙත් වලින් යුත් සුරූපී අප්සරාවන්ද (එහි සිටිනු ඇත).

وَحُورٌ عِينٌ ﴿٢٣﴾

24. (ඔවුන්) මනාව ආරක්ෂා කරන ලද මුතු මෙන්ය.

كَأَمْثَالِ اللُّؤْلُؤِ الْمَكْنُونِ ﴿٢٤﴾

25. (ඒවා) ඔවුන් කළ දේට තිළිණය ලෙසය.

جَزَاءً بِمَا كَانُوا يَعْمَلُونَ ﴿٢٥﴾

26. ඔවුන් එහි කිසිදු පුහුබස්ද පාපිෂ්ඨ කටාද නොඅසන්නෝය.

لَا يَسْمَعُونَ فِيهَا لَغْوًا وَلَا تَأْثِيمًا ﴿٢٦﴾

27. 'සාමය, සාමය' (යන සුභ පැතීමේ) කියමන හැරය.

إِلَّا قِيلًا سَلَامًا سَلَامًا ﴿٢٧﴾

وَاَصۡحٰبُ الۡيَمِيۡنِ ۙ مَاۤ اَصۡحٰبُ الۡيَمِيۡنِ ؕ ﴿٢٨﴾

28. තවද දකුණු පසෙහි සිටින්නන්ය. දකුණු පසෙහි සිටින්නන් කවුරුන්ද?

فِىۡ سِدۡرٍ مَّخۡضُوۡدٍ ۙ ﴿٢٩﴾

29. කටු රහිත මසන් ගස් අතරෙහි (ඔවුන් සිටින්නෝ)ය.

وَّطَلۡحٍ مَّنۡضُوۡدٍ ۙ ﴿٣٠﴾

30. තවද පොකුරු පොකුරු කෙසෙල් (වතු)හිද,

وَّظِلٍّ مَّمۡدُوۡدٍ ۙ ﴿٣١﴾

31. ඉතා විහිදුණු සෙවණැලිහිද,

وَّمَآءٍ مَّسۡكُوۡبٍ ۙ ﴿٣٢﴾

32. ගලා යන්නා වූ ජලයෙහිද,

وَّفَاكِهَةٍ كَثِيۡرَةٍ ۙ ﴿٣٣﴾

33. බහුලව ඇති පළතුරුහිද,

لَّا مَقۡطُوۡعَةٍ وَّلَا مَمۡنُوۡعَةٍ ۙ ﴿٣٤﴾

34. (එම පළතුරු) හිඟ වන්නේද නැත. වළක්වනු ලබන්නේද නැත.

وَّفُرُشٍ مَّرۡفُوۡعَةٍ ؕ ﴿٣٥﴾

35. තවද උතුම් වූ කලත්‍රයන් (ඔවුනට ලැබෙනු ඇත.)

اِنَّاۤ اَنۡشَاۡنٰهُنَّ اِنۡشَآءً ۙ ﴿٣٦﴾

36. සැබැවින්ම අපි ඔවුන්ව ඉතා විශිෂ්ඨ ලෙස මවා ඇත්තෙමු.

فَجَعَلۡنٰهُنَّ اَبۡكَارًا ۙ ﴿٣٧﴾

37. අපි ඔවුන්ව සමකළ නොහැක්කන් ලෙස කළෙමු.

عُرُبًا اَتۡرَابًا ۙ ﴿٣٨﴾

38. සෙනෙහබර වූද සමවයසින් වූද (කළෙමු).

لِّاَصۡحٰبِ الۡيَمِيۡنِ ؕ ﴿٣٩﴾

39. දකුණු පසෙහි සිටින්නන් සඳහාය.

ثُلَّةٌ مِّنَ الۡاَوَّلِيۡنَ ۙ ﴿٤٠﴾

40. පෙර වූ ජනතාව අතුරින් මහා පිරිසකි.

وَثُلَّةٌ مِّنَ الۡاٰخِرِيۡنَ ؕ ﴿٤١﴾

41. තවද පසු කාලීන ජනතාව අතුරින් මහා පිරිසකි.

وَاَصۡحٰبُ الشِّمَالِ ۙ مَاۤ اَصۡحٰبُ الشِّمَالِ ؕ ﴿٤٢﴾

42. තවද වම් පසෙහි සිටින්නන්ය. වම් පසෙහි සිටින්නන් කවුරුන්ද?

فِىۡ سَمُوۡمٍ وَّحَمِيۡمٍ ۙ ﴿٤٣﴾

43. (ඔවුන්) වේගවත් කර්කශ සුළඟ සහ කැකෑරෙන්නා වූ ලෝදිය අතරෙහිය.

44. තවද කලු දුමාරයේ සෙවණැල්ලෙහිය.

وَّظِلٍّ مِّنْ يَّحْمُوْمٍ ۙ ﴿٤٤﴾

45. එය සිසිල්ද නැත. සැනසුමක්ද නැත.

لَّا بَارِدٍ وَّلَا كَرِيْمٍ ﴿٤٥﴾

46. මීට පෙර නියතවශයෙන්ම ඔවුන් සුඛෝපභෝගී ජීවිතයක් ගත කළහ.

اِنَّهُمْ كَانُوْا قَبْلَ ذٰلِكَ مُتْرَفِيْنَ ۚ ﴿٤٦﴾

47. තවද ඔවුන් බරපතල පාපයෙහි නියැලී සිටියහ.

وَكَانُوْا يُصِرُّوْنَ عَلَى الْحِنْثِ الْعَظِيْمِ ۚ ﴿٤٧﴾

48. තවද ඔවුහු, 'කිමද! අපි මරණයට පත්වී හුදු පස් දූවිලි සහ ඇටකටු බවට පත්වූ පසුවත් අපි නැවතත් නැගිටුවනු ලබන්නෙමුදැ?'යි කියමින් සිටියහ.

وَكَانُوْا يَقُوْلُوْنَ ۙ اَئِذَا مِتْنَا وَكُنَّا تُرَابًا وَّعِظَامًا ءَاِنَّا لَمَبْعُوْثُوْنَ ۙ ﴿٤٨﴾

49. 'එමෙන්ම පෙර විසූ අපගේ පියවරුන් පවා (නැගිටුවනු ලබන්නේද)?'

اَوَاٰبَآؤُنَا الْاَوَّلُوْنَ ﴿٤٩﴾

50. පවසන්න, '(එසේය) පෙර විසූ අයද පසුකාලීන අයද,

قُلْ اِنَّ الْاَوَّلِيْنَ وَالْاٰخِرِيْنَ ۙ ﴿٥٠﴾

51. 'සියල්ලම නියමිත දිනයක නියමිත වේලාවකදී එක්රැස් කරනු ලබන්නෝමය.'

لَمَجْمُوْعُوْنَ ۙ اِلٰى مِيْقَاتِ يَوْمٍ مَّعْلُوْمٍ ﴿٥١﴾

52. 'පසුව, එම්බල නොමග ගිය අයවලුනි! (සත්‍යය) ප්‍රතික්ෂේප කළ අයවලුනි! නියතවශයෙන්ම නුඹලා,

ثُمَّ اِنَّكُمْ اَيُّهَا الضَّآلُّوْنَ الْمُكَذِّبُوْنَ ۙ ﴿٥٢﴾

53. 'zසක්කූම් (පතොක්) ගසෙන් අනුභව කරන්නන්ය.'

لَاٰكِلُوْنَ مِنْ شَجَرٍ مِّنْ زَقُّوْمٍ ۙ ﴿٥٣﴾

54. 'පසුව එයින් (තමන්ගේ) කුස් පුරවන්නන්ය'

فَمَالِـُٔوْنَ مِنْهَا الْبُطُوْنَ ۚ ﴿٥٤﴾

55. 'පසුව ඒ මත ලෝදිය පානය කරන්නන්ය'

فَشٰرِبُوْنَ عَلَيْهِ مِنَ الْحَمِيْمِ ۚ ﴿٥٥﴾

56. 'පසුව අධික පිපාසිත ඔටුවන් පානය කරන්නාක් මෙන්, පානය කරන්නන්ය.'

فَشٰرِبُوْنَ شُرْبَ الْهِيْمِ ۗ ﴿٥٦﴾

هٰذَا نُزُلُهُمْ يَوْمَ الدِّيْنِ ۟ؕ ٥٧

57. විනිශ්චය දිනයේදී ඔවුන් සඳහා ආගන්තුක සත්කාරය මෙය වනු ඇත.

نَحْنُ خَلَقْنٰكُمْ فَلَوْلَا تُصَدِّقُوْنَ ٥٨

58. නුඹලාව මවා ඇත්තේ අපිමය. එසේ නම් නුඹලා (සත්‍යය) පිළිනොගන්නේ මන්ද?

اَفَرَءَيْتُمْ مَّا تُمْنُوْنَ ۟ؕ ٥٩

59. නුඹලා විමෝචනය කරන දේ (ශුක්‍රාණු බිඳුව) ගැන කුමක් සිතන්නෙහුද?

ءَاَنْتُمْ تَخْلُقُوْنَهٗۤ اَمْ نَحْنُ الْخٰلِقُوْنَ ٦٠

60. එය මවා ඇත්තේ නුඹලාද නැතහොත් මැවුම්කරුවන් වන අපිද?

نَحْنُ قَدَّرْنَا بَيْنَكُمُ الْمَوْتَ وَمَا نَحْنُ بِمَسْبُوْقِيْنَ ۟ۙ ٦١

61. නුඹලා අතර මරණය නියම කර ඇත්තේ අපිමය. තවද අපව (එයින්) වැළැක්විය නොහැක.

عَلٰۤى اَنْ نُّبَدِّلَ اَمْثَالَكُمْ وَنُنْشِئَكُمْ فِيْ مَا لَا تَعْلَمُوْنَ ٦٢

62. අප නුඹලාගේ ස්වරූපය වෙනස් කිරීමෙන්ද නුඹලා නොදන්නා ස්වරූපයකින් අප නුඹලාව නැගිටුවීමෙන්ද (අපව වැළැක්විය නොහැක).

وَلَقَدْ عَلِمْتُمُ النَّشْاَةَ الْاُوْلٰى فَلَوْلَا تَذَكَّرُوْنَ ٦٣

63. තවද නිශ්චිතවම නුඹලා පළමු මැවීම ගැන දැන ගත්තෙහුය. එසේ නම්, නුඹලා මෙනෙහි නොකරන්නේ මන්ද?

اَفَرَءَيْتُمْ مَّا تَحْرُثُوْنَ ۟ؕ ٦٤

64. නුඹලා වපුරන දේ නුඹලා දුටුවෙහුද?

ءَاَنْتُمْ تَزْرَعُوْنَهٗۤ اَمْ نَحْنُ الزّٰرِعُوْنَ ٦٥

65. එය වැඩීමට සලස්වන්නේ නුඹලාද නැතහොත් වැඩීමට සලස්වන්නන් වන අපිද?

لَوْ نَشَآءُ لَجَعَلْنٰهُ حُطَامًا فَظَلْتُمْ تَفَكَّهُوْنَ ٦٦

66. අප අභිමත වූවා නම්, එය දහයියා බවට අපට පත් කරන්නට තිබුණි. එවිට නුඹලා ළතැවෙන්නෙහුය.

اِنَّا لَمُغْرَمُوْنَ ۟ۙ ٦٧

67. 'නියතවශයෙන්ම අපි මහත් පීඩනයට ලක්වන්නන් වෙමු!'

بَلْ نَحْنُ مَحْرُوْمُوْنَ ٦٨

68. 'එපමණක් නොව, අපි (සියල්ලෙන්) අත්හරිනු ලැබුවෙමු'

أَفَرَءَيْتُمُ الْمَآءَ الَّذِى تَشْرَبُونَ ﴿٦٩﴾

69. නුඹලා පානය කරන්නාවූ ජලය නුඹලා සිතා බැලුවෙහුද?

ءَأَنتُمْ أَنزَلْتُمُوهُ مِنَ الْمُزْنِ أَمْ نَحْنُ الْمُنزِلُونَ ﴿٧٠﴾

70. එය වළාකුළු වලින් පහළ කරන්නේ නුඹලාද නැතහොත් පහළ කරන්නන් වන අපිද?

لَوْ نَشَآءُ جَعَلْنَٰهُ أُجَاجًا فَلَوْلَا تَشْكُرُونَ ﴿٧١﴾

71. අප අභිමත වුයේ නම් අපට එය ලුණු බවට පත් කරන්නට තිබිණි. එසේනම් නුඹලා කෘතඥ නොවන්නේ මන්ද?

أَفَرَءَيْتُمُ النَّارَ الَّتِى تُورُونَ ﴿٧٢﴾

72. නුඹලා මොළවන්නාවූ ගින්න නුඹලා බැලුවෙහුද?

ءَأَنتُمْ أَنشَأْتُمْ شَجَرَتَهَآ أَمْ نَحْنُ الْمُنشِـُٔونَ ﴿٧٣﴾

73. එහි ගස උත්පාදනය කරන්නේ නුඹලාද, නැතහොත් උත්පාදකයන් වන අපිද?

نَحْنُ جَعَلْنَٰهَا تَذْكِرَةً وَمَتَٰعًا لِّلْمُقْوِينَ ﴿٧٤﴾

74. අපි එය සිහිකිරීමක් ලෙසද ගමනේ යෙදෙන්නන්ට ප්‍රයෝජනයක් ලෙසද කළෙමු.

فَسَبِّحْ بِاسْمِ رَبِّكَ الْعَظِيمِ ﴿٧٥﴾

75. එබැවින් අති ශ්‍රේෂ්ඨවූ ඔබගේ අධිපතියාණන්ගේ නාමයෙන් සුවිශුද්ධ කරන්න.

فَلَآ أُقْسِمُ بِمَوَٰقِعِ النُّجُومِ ﴿٧٦﴾

76. නොඑසේය, මම තාරකා පිහිටි ස්ථාන සාක්ෂි කොට කියමි.

وَإِنَّهُۥ لَقَسَمٌ لَّوْ تَعْلَمُونَ عَظِيمٌ ﴿٧٧﴾

77. තවද නුඹලා දැන සිටියේ නම් ඇත්තෙන්ම එය මහත් දිවුරුමකි.

إِنَّهُۥ لَقُرْءَانٌ كَرِيمٌ ﴿٧٨﴾

78. ඇත්තෙන්ම මෙය උතුම් වූ කුර්ආනයයි.

فِى كِتَٰبٍ مَّكْنُونٍ ﴿٧٩﴾

79. මනා ආරක්ෂිත ග්‍රන්ථයෙහිය.

لَّا يَمَسُّهُۥٓ إِلَّا الْمُطَهَّرُونَ ﴿٨٠﴾

80. පරිශුද්ධ කරනු ලැබූවන් මිස අන්කිසිවෙක් එය ස්පර්ශ නොකරන්නෝය.

تَنزِيلٌ مِّن رَّبِّ الْعَٰلَمِينَ ﴿٨١﴾

81. මෙය සර්ව ලෝකයන්හි අධිපතියාණන්ගෙන් පහළ වූවකි.

82. එසේනම් නුඹලා මෙම (දේව) අනුශාසනාව සුළු කොට සළකන්නෙහුද?

أَفَبِهَٰذَا الْحَدِيثِ أَنتُم مُّدْهِنُونَ ﴿٨٢﴾

83. තවද නුඹලා මෙය බොරු යැයි සැළකීම නුඹලාගේ ජීවනෝපාය කරගත්තෙහුද?

وَتَجْعَلُونَ رِزْقَكُمْ أَنَّكُمْ تُكَذِّبُونَ ﴿٨٣﴾

84. එසේ නම් කිමද! (මරණාසන්නයෙහි සිටින මිනිසෙකුගේ ප්‍රාණය ඔහුගේ) ගෙල තෙක් පැමිණි විට,

فَلَوْلَا إِذَا بَلَغَتِ الْحُلْقُومَ ﴿٨٤﴾

85. තවද ඒ අවස්ථාවෙහිදී නුඹලා (කර කියාගත නොහැකිව) බලා හිඳින්නෙහුය.

وَأَنتُمْ حِينَئِذٍ تَنظُرُونَ ﴿٨٥﴾

86. තවද අපි නුඹලාට වඩා ඔහු සමීපයෙහි සිටින්නෙමු. නමුත් නුඹලා නොදකින්නෙහුය.

وَنَحْنُ أَقْرَبُ إِلَيْهِ مِنكُمْ وَلَٰكِن لَّا تُبْصِرُونَ ﴿٨٦﴾

87. නුඹලාට කිසි වග උත්තරයක් නොමැති නම්,

فَلَوْلَا إِن كُنتُمْ غَيْرَ مَدِينِينَ ﴿٨٧﴾

88. (තවද) නුඹලා සත්‍යවාදීන් නම්, නුඹලාට එය (ප්‍රාණය) ආපසු ගෙන ඒමට හැකිද?

تَرْجِعُونَهَا إِن كُنتُمْ صَادِقِينَ ﴿٨٨﴾

89. එහෙයින් කවරෙකු හෝ (දෙවියන්ගේ) සමීපතාවය ලැබූවන් අතර සිටිත් නම්,

فَأَمَّا إِن كَانَ مِنَ الْمُقَرَّبِينَ ﴿٨٩﴾

90. පසුව (ඔහුට) සුවපහසුවද (සොම්නසෙහි) සුවඳද ආශිර්වාදයෙන් පිරි උද්‍යානයද (ලැබෙනු) ඇත.

فَرَوْحٌ وَرَيْحَانٌ وَجَنَّتُ نَعِيمٍ ﴿٩٠﴾

91. එමෙන්ම ඔහු දකුණු පසෙහි සිටින්නන් අතරින් නම්,

وَأَمَّا إِن كَانَ مِنْ أَصْحَابِ الْيَمِينِ ﴿٩١﴾

92. එවිට, 'දකුණු පසෙහි සිටින්නන් අතරින් වන ඔබට සාමය වේවා!'(යි කියනු ලැබේ).

فَسَلَامٌ لَّكَ مِنْ أَصْحَابِ الْيَمِينِ ﴿٩٢﴾

93. එහෙත් ඔහු (සත්‍යය) බොරු යැයි සළකන එමෙන්ම නොමගෙහි වූ අය අතරින් නම්,

وَاَمَّآ اِنۡ كَانَ مِنَ الۡمُكَذِّبِيۡنَ الضَّآلِّيۡنَ ۙ﴿۹۳﴾

94. පසුව (ඔහුට) සත්කාර කරනු ලබන්නේ ලෝ දියෙන්ය.

فَنُزُلٌ مِّنۡ حَمِيۡمٍ ۙ﴿۹۴﴾

95. තවද නිරයෙහි දැවෙනු ඇත.

وَّتَصۡلِيَةُ جَحِيۡمٍ ﴿۹۵﴾

96. ඇත්තෙන්ම මෙය නිශ්චිත සත්‍යයයි.

اِنَّ هٰذَا لَهُوَ حَقُّ الۡيَقِيۡنِ ۚ﴿۹۶﴾

97. එබැවින් අති ශ්‍රේෂ්ඨවූ ඔබගේ අධිපතියාණන්ගේ නාමයෙන් සුවිශුද්ධ කරන්න.

فَسَبِّحۡ بِاسۡمِ رَبِّكَ الۡعَظِيۡمِ ﴿۹۷﴾



## අල් හදීද්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

سَبَّحَ لِلَّهِ مَا فِي ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضِۖ وَهُوَ ٱلۡعَزِيزُ ٱلۡحَكِيمُ ②

2. අහස් සහ පොළොවෙහි ඇති සියල්ල අල්ලාහ්ව සුවිශුද්ධ කරන්නේය. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

لَهُۥ مُلۡكُ ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضِۖ يُحۡيِۦ وَيُمِيتُۖ وَهُوَ عَلَىٰ كُلِّ شَيۡءٖ قَدِيرٌ ③

3. අහස් සහ පොළොවෙහි රාජධානිය ඔහුට අයත්ය. ඔහු ජීවය දෙන්නේය. තවද ඔහු මරණය පමුණුවන්නේය. තවද ඔහු සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

هُوَ ٱلۡأَوَّلُ وَٱلۡأٓخِرُ وَٱلظَّٰهِرُ وَٱلۡبَاطِنُۖ وَهُوَ بِكُلِّ شَيۡءٍ عَلِيمٌ ④

4. ආරම්භයද අවසානයද ඔහුය. එමෙන්ම විද්‍යමානය, අදෘශ්‍යමානය. තවද ඔහු සියළු දේ මැනැවින් දන්නාය.

هُوَ ٱلَّذِي خَلَقَ ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضَ فِي سِتَّةِ أَيَّامٖ ثُمَّ ٱسۡتَوَىٰ عَلَى ٱلۡعَرۡشِۚ يَعۡلَمُ مَا يَلِجُ فِي ٱلۡأَرۡضِ وَمَا يَخۡرُجُ مِنۡهَا وَمَا يَنزِلُ مِنَ ٱلسَّمَآءِ وَمَا يَعۡرُجُ فِيهَاۖ وَهُوَ مَعَكُمۡ أَيۡنَ مَا كُنتُمۡۚ وَٱللَّهُ بِمَا تَعۡمَلُونَ بَصِيرٞ ⑤

5. අහස් සහ පොළොව කාලවකවානු සයකදී මැව්වේ ඔහුමය. පසුව ඔහු තමාව සිංහාසනය මත ස්ථාවර කර ගත්තේය. පොළොවට ඇතුළුවන දේද එයින් පිටවන දේද තවද අහසින් පහළ වන දේද එහි ඉහළට යන දේද ඔහු දන්නේය. තවද නුඹලා කොතැනක වුවද ඔහු නුඹලා සමගය. තවද අල්ලාහ් නුඹලා කරන සියළු දේ දකින්නේය.

لَّهُۥ مُلۡكُ ٱلسَّمَٰوَٰتِ وَٱلۡأَرۡضِۚ وَإِلَى ٱللَّهِ تُرۡجَعُ ٱلۡأُمُورُ ⑥

6. අහස් සහ පොළොවෙහි රාජධානිය ඔහුට අයත්ය. තවද සියළු කටයුතු යොමු කරනු ලබන්නේ අල්ලාහ් වෙතටය.

يُولِجُ ٱلَّيۡلَ فِي ٱلنَّهَارِ وَيُولِجُ ٱلنَّهَارَ فِي

7. ඔහු රැය දවාලෙහි ඇතුළු කරවන්නේය. තවද දහවල රැයෙහි

الَّيْلِ ۚ وَهُوَ عَلِيْمٌۢ بِذَاتِ الصُّدُوْرِ ﴿٧﴾

ඇතුළු කරවන්නේය. තවද සිත්හි ඇති සියළු දේවල් ඔහු මැනැවින් දන්නේය.

اٰمِنُوْا بِاللّٰهِ وَرَسُوْلِهٖ وَاَنْفِقُوْا مِمَّا جَعَلَكُمْ مُّسْتَخْلَفِيْنَ فِيْهِ ؕ فَالَّذِيْنَ اٰمَنُوْا مِنْكُمْ وَاَنْفَقُوْا لَهُمْ اَجْرٌ كَبِيْرٌ ﴿٨﴾

8. අල්ලාහ් හා ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කරනු. තවද ඔහු නුඹලාව උරුමක්කාරයන් කළ දෙයින් (අල්ලාහ්ගේ මාර්ගයෙහි) වැය කරනු. තවද නුඹලා අතුරින් විශ්වාස කොට වැය කළ අය ගත්කළ ඔවුන්හට අතිමහත් වූ තිළිණයක් ඇත.

وَمَا لَكُمْ لَا تُؤْمِنُوْنَ بِاللّٰهِ ۚ وَالرَّسُوْلُ يَدْعُوْكُمْ لِتُؤْمِنُوْا بِرَبِّكُمْ وَقَدْ اَخَذَ مِيْثَاقَكُمْ اِنْ كُنْتُمْ مُّؤْمِنِيْنَ ﴿٩﴾

9. නුඹලා අල්ලාහ් කෙරෙහි විශ්වාස නොකිරීමට නුඹලාට කුමක් සිදුවී ඇත්ද? තවද දූතයාණන් නුඹලාව කැඳවන්නේ නුඹලා නුඹලාගේ අධිපතියාණන් කෙරෙහි විශ්වාස කරනු පිණිසය. තවද නුඹලා ඇත්තෙන්ම විශ්වාසිතයින් නම් (ඔහු) නුඹලාගෙන් මෙලහකටත් ප්‍රතිඥාවක් ලබා ඇත්තේය.

هُوَ الَّذِيْ يُنَزِّلُ عَلٰى عَبْدِهٖۤ اٰيٰتٍۢ بَيِّنٰتٍ لِّيُخْرِجَكُمْ مِّنَ الظُّلُمٰتِ اِلَى النُّوْرِ ؕ وَاِنَّ اللّٰهَ بِكُمْ لَرَءُوْفٌ رَّحِيْمٌ ﴿١٠﴾

10. ඔහු නුඹලාව (සියලු ආකාරයේ) අන්ධකාරයෙන් ආලෝකය වෙතට ගෙන එනු පිණිස තම දාසයාට පැහැදිලි සළකුණු පහළ කරන්නේය. තවද සැබැවින්ම අල්ලාහ් නුඹලා කෙරෙහි සානුකම්පිතය, පරම දයාබරය.

وَمَا لَكُمْ اَلَّا تُنْفِقُوْا فِيْ سَبِيْلِ اللّٰهِ وَلِلّٰهِ مِيْرَاثُ السَّمٰوٰتِ وَالْاَرْضِ ؕ لَا يَسْتَوِيْ مِنْكُمْ مَّنْ اَنْفَقَ مِنْ قَبْلِ الْفَتْحِ وَقٰتَلَ ؕ اُولٰٓئِكَ اَعْظَمُ دَرَجَةً مِّنَ الَّذِيْنَ اَنْفَقُوْا مِنْۢ بَعْدُ وَقٰتَلُوْا ؕ وَكُلًّا وَّعَدَ اللّٰهُ الْحُسْنٰى ؕ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ خَبِيْرٌ ﴿١١﴾ ع

11. නුඹලා අල්ලාහ්ගේ මාර්ගයේ වැය නොකිරීමට නුඹලාට කුමක් සිදුවී ඇත්ද? තවද අහස් සහ පොළොවෙහි උරුමය අල්ලාහ්ටමය. නුඹලා අතුරින්, ජයග්‍රහණයට පෙර (අල්ලාහ්ගේ මාර්ගයෙහි) වැය කර තවද සටන් කළ අය, (පසුව එලෙස කළ අයට) සමාන නොවෙති. ඔවුන් පසුව (එලෙස) වැය කර තවද සටන් කළ අයට වඩා තරාතිරමෙන් උසස්ය. තවද සියල්ලන්ටම අල්ලාහ් යහපත් දේ පොරොන්දු වී ඇත්තේය. තවද අල්ලාහ් නුඹලා කරන සියලු දේ ගැන ඉතා විමසිලිමත්ය.

12. අල්ලාහ්ට යහපත් ණයක් ලබා දෙන්නේ කවරෙක්ද?, එසේනම් ඔහු එය කිහිප ගුණයකින් වැඩි කර ඔහුට ලබාදෙන්නේය. තවද ඔහුට උතුම් තිළිණයක් ලැබෙනු ඇත.

مَنْ ذَا الَّذِي يُقْرِضُ اللَّهَ قَرْضًا حَسَنًا فَيُضَاعِفَهُ لَهُ وَلَهُ أَجْرٌ كَرِيمٌ ﴿١٢﴾

13. තවද ඔබ එම දිනයේ විශ්වාසිත පුරුෂයින්ද විශ්වාසිත ස්ත්‍රීන්ද ඔවුන්ගේ ආලෝකය ඔවුනට ඉදිරියෙන්ද ඔවුන්ගේ දකුණු පසින්ද දිවයෑම දකින්නෙහිය. (තවද ඔවුනට) 'මෙදින නුඹලාට ශුභාරංචි වේ! එතුලින් ගලා බසිනා ගංගාවන් යුත් උද්‍යානයන්හි නුඹලා සදාකල් වෙසෙන්නෙහුය. අතිමහත් වූ ජයග්‍රහණය මෙය වේ'(යැයි කියනු ලැබේ).

يَوْمَ تَرَى الْمُؤْمِنِينَ وَالْمُؤْمِنَاتِ يَسْعَىٰ نُورُهُمْ بَيْنَ أَيْدِيهِمْ وَبِأَيْمَانِهِمْ بُشْرَاكُمُ الْيَوْمَ جَنَّاتٌ تَجْرِي مِنْ تَحْتِهَا الْأَنْهَارُ خَالِدِينَ فِيهَا ۚ ذَٰلِكَ هُوَ الْفَوْزُ الْعَظِيمُ ﴿١٣﴾

14. 'නුඹලාගේ ආලෝකයෙන් අපද ආලෝකය ලබාගනු පිණිස අප වෙනුවෙන් (මොහොතක්) බලාසිටිනු'යි කුහක පුරුෂයින්ද කුහක ස්ත්‍රීන්ද විශ්වාස කළවුන්ට පවසන එදිනෙහි (ඔවුන් වෙත), 'නුඹලා ආපසු යනු. ආලෝකය සොයාගනු'(යැයි පවසනු ලබන්නේය). පසුව ඔවුනතරට දොරටුවක් සහිත පවුරක් බඳිනු ලබන්නේය. එහි ඇතුලත දයාවත් එහි පිටත ඉදිරිපසින් දඬුවමත් වනු ඇත.

يَوْمَ يَقُولُ الْمُنَافِقُونَ وَالْمُنَافِقَاتُ لِلَّذِينَ آمَنُوا انْظُرُونَا نَقْتَبِسْ مِنْ نُورِكُمْ قِيلَ ارْجِعُوا وَرَاءَكُمْ فَالْتَمِسُوا نُورًا ۖ فَضُرِبَ بَيْنَهُمْ بِسُورٍ لَهُ بَابٌ ۖ بَاطِنُهُ فِيهِ الرَّحْمَةُ وَظَاهِرُهُ مِنْ قِبَلِهِ الْعَذَابُ ﴿١٤﴾

15. 'අපි නුඹලා සමග නොසිටියෙමුදෑ?'යි (කුහකයින් වන) ඔවුන් මොවුන් අමතා කියන්නෝය. එවිට (විශ්වාසිතයින් වන) මොවුන්, 'එසේය, නමුත් නුඹලා නුඹලාවම වරදට පොලඹවා ගත්තෙහුය. (අපට විනාශය ඇති වන්නට) නුඹලා බලා සිටියෙහුය. තවද සැකයෙන් පසුවූවෙහුය. අල්ලාහ්ගේ තීන්දුව පැමිණෙන තෙක් නුඹලාගේ පුහු ආශාවන් නුඹලාව මුළාවට පත්කළේය. තවද මුළාකරන්නා නුඹලාව අල්ලාහ් සම්බන්ධව මුළාවට පත් කළේයැ'(යි පිළිතුරු දෙන්නෝය).

يُنَادُونَهُمْ أَلَمْ نَكُنْ مَعَكُمْ ۖ قَالُوا بَلَىٰ وَلَٰكِنَّكُمْ فَتَنْتُمْ أَنْفُسَكُمْ وَتَرَبَّصْتُمْ وَارْتَبْتُمْ وَغَرَّتْكُمُ الْأَمَانِيُّ حَتَّىٰ جَاءَ أَمْرُ اللَّهِ وَغَرَّكُمْ بِاللَّهِ الْغَرُورُ ﴿١٥﴾

فَالْيَوْمَ لَا يُؤْخَذُ مِنْكُمْ فِدْيَةٌ وَّلَا مِنَ الَّذِيْنَ كَفَرُوْا ۭ مَاْوٰىكُمُ النَّارُ ۭ هِىَ مَوْلٰىكُمْ ۭ وَبِئْسَ الْمَصِيْرُ ۝۱۶

16. 'එබැවින් මෙදින නුඹලාගෙන් හෝ අවිශ්වාස කළ අයගෙන් හෝ කිසිදු වන්දියක් පිළිගනු නොලබන්නේය. නුඹලාගේ අවසාන වාසස්ථානය ගින්න වේ. එය නුඹලාගේ මිතුරාය. තවද එය ඉතා නපුරු නවාතැනකි'.

اَلَمْ يَاْنِ لِلَّذِيْنَ اٰمَنُوْٓا اَنْ تَخْشَعَ قُلُوْبُهُمْ لِذِكْرِ اللّٰهِ وَمَا نَزَلَ مِنَ الْحَقِّ ۙ وَلَا يَكُوْنُوْا كَالَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ مِنْ قَبْلُ فَطَالَ عَلَيْهِمُ الْاَمَدُ فَقَسَتْ قُلُوْبُهُمْ ۭ وَكَثِيْرٌ مِّنْهُمْ فٰسِقُوْنَ ۝۱۷

17. විශ්වාස කළ අයගේ හදවත් අල්ලාහ්ව සිහිකිරීමටද ඔහු (ඔවුන් වෙත) පහළ කළාවූ සත්‍යයටද අවනතවීමේ කාලය නොපැමිණියේද? එමෙන්ම මොවුන්ට පෙර පුස්තකය දෙන ලද අය මෙන් මොවුන් පත් නොවෙත්වා! එබැවින් ඔවුන් සඳහා කාල අවකාශය දීර්ඝ වූ හෙයින් ඔවුන්ගේ හදවත් දැඩි විය. තවද ඔවුන්ගෙන් බොහෝ අය දුෂ්ඨයින් වූහ.

اِعْلَمُوْٓا اَنَّ اللّٰهَ يُحْيِ الْاَرْضَ بَعْدَ مَوْتِهَا ۭ قَدْ بَيَّنَّا لَكُمُ الْاٰيٰتِ لَعَلَّكُمْ تَعْقِلُوْنَ ۝۱۸

18. අල්ලාහ් පොළොව එය මළ පසු ප්‍රාණවත් කරන්නේ යැයි දැනගනු. නුඹලා වටහා ගනු පිණිස අපි නුඹලාට සළකුණු පැහැදිලි කර ඇත්තෙමු.

اِنَّ الْمُصَّدِّقِيْنَ وَالْمُصَّدِّقٰتِ وَاَقْرَضُوا اللّٰهَ قَرْضًا حَسَنًا يُّضٰعَفُ لَهُمْ وَلَهُمْ اَجْرٌ كَرِيْمٌ ۝۱۹

19. දන් දෙන්නාවූ පුරුෂයින්ද දන් දෙන්නාවූ ස්ත්‍රීන්ද එමෙන්ම අල්ලාහ්ට යහපත් ණයක් දෙනවුන් ගත්කල ඔවුනට එය කිහිප ගුණයකින් වැඩි කර දෙනු ලබන්නේය. තවද ඔවුන්ට උතුම් වූ තිළිණයක්ද ලැබෙනු ඇත.

وَالَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ وَرُسُلِهٖٓ اُولٰۤىِٕكَ هُمُ الصِّدِّيْقُوْنَ ڰ وَالشُّهَدَاۗءُ عِنْدَ رَبِّهِمْ ۭ لَهُمْ اَجْرُهُمْ وَنُوْرُهُمْ ۭ وَالَّذِيْنَ كَفَرُوْا وَكَذَّبُوْا بِاٰيٰتِنَآ اُولٰۤىِٕكَ اَصْحٰبُ الْجَحِيْمِ ۝۲۰

20. තවද අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කරන්නන් ගත්කල ඔවුන්ම අල්ලාහ්ගේ අභියසෙහි සත්‍යවන්තයින් මෙන්ම සත්‍යයට සාක්ෂි දරන්නන් වන්නෝය. ඔවුන්ගේ තිළිණයද ඔවුන්ගේ ආලෝකයද ඔවුන්ට ලැබෙනු ඇත. නමුත් අවිශ්වාස කොට අපගේ සළකුණු ප්‍රතික්ෂේප කළ අය ගත්කල නිරයෙහි සහකරුවන් ඔවුන්මය.

اِعْلَمُوْٓا اَنَّمَا الْحَيٰوةُ الدُّنْيَا لَعِبٌ وَّلَهْوٌ
وَّزِيْنَةٌ وَّتَفَاخُرٌۢ بَيْنَكُمْ وَتَكَاثُرٌ فِى
الْاَمْوَالِ وَالْاَوْلَادِ ؕ كَمَثَلِ غَيْثٍ
اَعْجَبَ الْكُفَّارَ نَبَاتُهٗ ثُمَّ يَهِيْجُ
فَتَرٰىهُ مُصْفَرًّا ثُمَّ يَكُوْنُ حُطَامًا ؕ
وَفِى الْاٰخِرَةِ عَذَابٌ شَدِيْدٌ ۙ وَّمَغْفِرَةٌ
مِّنَ اللّٰهِ وَرِضْوَانٌ ؕ وَمَا الْحَيٰوةُ الدُّنْيَآ
اِلَّا مَتَاعُ الْغُرُوْرِ ﴿٢١﴾

21. මෙලොව ජීවිතය කෙළි සෙල්ලමක්ද විනෝදයක්ද අලංකාරයක්ද නුඹලා අතර පුරසාරම් දොඩවීමක්ද වස්තූන් සහ දරුවන් වැඩිකර ගැනීමෙහි තරග වැදීමක්ද වන බව දැනගනු. (මෙලොව ජීවිතය) වර්ෂාවක් බඳුය. එමගින් හටගන්නාවූ ගස්වැල් අස්වැද්දුවන් තුල්මත් කරයි. පසුව එය වියළී ගොස් කහ පැහැ වනු ඔබ දකින්නෙහිය. පසුව එය කැබැලි (වූ පිදුරු) බවට පත්වන්නේය. එමෙන්ම (ලෞකික ජීවිතය පමණක් ඇලුම් කරනවුනට) පරලොවෙහිදී දැඩි දඬුවමක් වන අතර (අනෙක් අයහට) අල්ලාහ්ගෙන් ක්ෂමාවද (ඔහුගේ) සොම්නසද වන්නේය. තවද මෙලොව ජීවිතය (තාවකාලික) රැවටිලිකාරී ආස්වාදයක් මිස අන් කිසිවක් නොවේ.

سَابِقُوْٓا اِلٰى مَغْفِرَةٍ مِّنْ رَّبِّكُمْ وَجَنَّةٍ
عَرْضُهَا كَعَرْضِ السَّمَآءِ وَالْاَرْضِ ۙ
اُعِدَّتْ لِلَّذِيْنَ اٰمَنُوْا بِاللّٰهِ وَرُسُلِهٖ ؕ
ذٰلِكَ فَضْلُ اللّٰهِ يُؤْتِيْهِ مَنْ يَّشَآءُ ؕ
وَاللّٰهُ ذُو الْفَضْلِ الْعَظِيْمِ ﴿٢٢﴾

22. නුඹලාගේ අධිපතියාණන්ගෙන් ක්ෂමාව අයැදීමටද අහස සහ පොළොවෙහි විශාලත්වය බඳු පරාසයක් ඇති ස්වර්ගය සඳහාද නුඹලා එකිනෙකා යුහුසුළු වනු. එය අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කළ අය සඳහා පිළියෙල කරන ලද්දකි. එය අල්ලාහ්ගේ වරප්‍රසාදය වේ. ඔහු අභිමත කෙනෙකුට ඔහු එය පිරිනමන්නේය. තවද අල්ලාහ් ඉමහත් වරප්‍රසාද ඇත්තාය.

مَآ اَصَابَ مِنْ مُّصِيْبَةٍ فِى الْاَرْضِ
وَلَا فِىْٓ اَنْفُسِكُمْ اِلَّا فِىْ كِتٰبٍ مِّنْ قَبْلِ
اَنْ نَّبْرَاَهَا ؕ اِنَّ ذٰلِكَ عَلَى اللّٰهِ يَسِيْرٌ ﴿٢٣﴾

23. පොළොවෙහි හෝ නුඹලා අතරෙහි හෝ කිසියම් විපත්තියක්, අපි එය හෙළි කරන්නට පෙර ග්‍රන්ථයෙහි (සඳහන්) මිස එය සිදුනොවන්නේය. නියතවශයෙන්ම එය අල්ලහ්ට පහසු දෙයකි.

لِّكَيْلَا تَاْسَوْا عَلٰى مَا فَاتَكُمْ
وَلَا تَفْرَحُوْا بِمَآ اٰتٰىكُمْ ؕ وَاللّٰهُ لَا يُحِبُّ

24. එය නුඹලාට අහිමි වූ දේ ගැන නුඹලා කණගාටු නොවනු පිණිසද නැතහොත් ඔහු නුඹලාට ලබා දී ඇති දේ ගැන නුඹලා උදම් නොවනු

පිණිසද වේ. තවද අහංකාරව පුරසාරම් දොඩවන කිසිවෙකුවත් අල්ලාහ් ප්‍රිය නොකරන්නේය.

كُلَّ مُخْتَالٍ فَخُورٍ ۝٢٤

25. එවැන්නන් මසුරු වෙති. (එසේම) මිනිසුන්ව මසුරුකමට පොලඹවති. තවද යමෙක් පිටුපා යන්නේද, නියත වශයෙන්ම අල්ලාහ් ස්වයංපෝෂිතය, ප්‍රශංසා හිමිය (යැයි ඔහු සිහිතබා ගනිත්වා).

الَّذِينَ يَبْخَلُونَ وَيَأْمُرُونَ النَّاسَ بِالْبُخْلِ ۗ وَمَنْ يَتَوَلَّ فَإِنَّ اللَّهَ هُوَ الْغَنِيُّ الْحَمِيدُ ۝٢٥

26. සැබැවින්ම අපි අපගේ දූතයින්ව පැහැදිලි සළකුණු සමග එවා ඇත්තෙමු. තවද අප පුස්ථකයද තුලාවද ඔවුන් සමග පහළ කළෙමු. (එය) මිනිසුන් යුක්ති සහගතව කටයුතු කිරීම පිණිසය. තවද අපි යකඩ පහළ කළෙමු. එහි දැඩි යුධ ආම්පන්න(සඳහා අමුද්‍රව්‍ය)ද මිනිසුන්ට (බොහෝ) ප්‍රයෝජනද ඇත. තවද (එය) ඔහුට සහ ඔහුගේ දූතයින්ට නොපෙනෙන ආකාරයට උපකාර කරන්නේ කවුරුන්දැයි ඔහු දැනගනු පිණිසය. නියතවශයෙන්ම අල්ලාහ් ශක්ති සම්පන්නය, බලසම්පන්නය.

لَقَدْ أَرْسَلْنَا رُسُلَنَا بِالْبَيِّنَاتِ وَأَنْزَلْنَا مَعَهُمُ الْكِتَابَ وَالْمِيزَانَ لِيَقُومَ النَّاسُ بِالْقِسْطِ ۖ وَأَنْزَلْنَا الْحَدِيدَ فِيهِ بَأْسٌ شَدِيدٌ وَمَنَافِعُ لِلنَّاسِ وَلِيَعْلَمَ اللَّهُ مَنْ يَنْصُرُهُ وَرُسُلَهُ بِالْغَيْبِ ۚ إِنَّ اللَّهَ قَوِيٌّ عَزِيزٌ ۝٢٦ ع

27. තවද නියතවශයෙන්ම අපි නූහ්ද ඉබ්රාහිම්ද (වක්තෘන් ලෙස) එවා ඇත්තෙමු. තවද අපි ඔවුන්ගේ මතු පරපුරෙහි වක්තෘත්වයද පුස්තකයද ලැබීමට සැලැස්වූයෙමු. එබැවින් ඔවුන්ගෙන් සමහරුන් යහමග ලද්දන්ය. එමෙන්ම ඔවුන්ගෙන් බොහෝ අය කැරළිකරුවන් වූහ.

وَلَقَدْ أَرْسَلْنَا نُوحًا وَإِبْرَاهِيمَ وَجَعَلْنَا فِي ذُرِّيَّتِهِمَا النُّبُوَّةَ وَالْكِتَابَ ۖ فَمِنْهُمْ مُهْتَدٍ ۖ وَكَثِيرٌ مِنْهُمْ فَاسِقُونَ ۝٢٧

28. පසුව අපි අපගේ දූතයින්ව (වක්තෘවරුන් වන) ඔවුන්ගේ අඩිපාර අනුගමනය කරන්නට සැළැස්වූවෙමු. තවද අපි මරියම්ගේ පුත් ඊසාවද (ඔවුන්ගේ අඩිපාර) අනුගමනය කරන්නට සැළැස්වූවෙමු. තවද අපි ඔහුට ඉන්ජීල්(ශුභාරංචිය)ද දුනිමු. තවද අපි ඔහුව පිළිගත් අයගේ හදවත්හි කරුණාවද දයාවයද ඇති කළෙමු. තවද ශ්‍රමණ ජීවිතය ඔවුන්

ثُمَّ قَفَّيْنَا عَلَىٰ آثَارِهِمْ بِرُسُلِنَا وَقَفَّيْنَا بِعِيسَى ابْنِ مَرْيَمَ وَآتَيْنَاهُ الْإِنْجِيلَ ۖ وَجَعَلْنَا فِي قُلُوبِ الَّذِينَ اتَّبَعُوهُ رَأْفَةً وَرَحْمَةً ۚ وَرَهْبَانِيَّةً

ابْتَدَعُوهَا مَا كَتَبْنٰهَا عَلَيْهِمْ اِلَّا
ابْتِغَآءَ رِضْوَانِ اللّٰهِ فَمَا رَعَوْهَا حَقَّ
رِعَايَتِهَا ۚ فَاٰتَيْنَا الَّذِيْنَ اٰمَنُوْا مِنْهُمْ
اَجْرَهُمْ ۚ وَكَثِيْرٌ مِّنْهُمْ فٰسِقُوْنَ ﴿٢٨﴾

අලුතින් ඇති කළහ. අපි එය ඔවුන් සඳහා නියම නොකළෙමු. නමුත් එය අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගැනීමේ චේතනාවෙන් මිස (ඔවුහු එය නොකළෙහුය). නමුත් ඔවුන් එය පිළිපැදිය යුතු ආකාරයට පිළිපැදුවේ නැත. එබැවින් ඔවුන්ගෙන් විශ්වාස කළ අයහට ඔවුන්ගේ තිළිණය අපි ලබා දුනිමු. නමුත් ඔවුන්ගෙන් බොහෝ අය කැරළිකරුවන් වූහ.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوا اتَّقُوا اللّٰهَ وَاٰمِنُوْا
بِرَسُوْلِهٖ يُؤْتِكُمْ كِفْلَيْنِ مِنْ رَّحْمَتِهٖ
وَيَجْعَلْ لَّكُمْ نُوْرًا تَمْشُوْنَ بِهٖ
وَيَغْفِرْ لَكُمْ ۗ وَاللّٰهُ غَفُوْرٌ رَّحِيْمٌ ﴿٢٩﴾

29. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කරනු. ඔහු නුඹලාට ඔහුගේ දයාවෙන් දෙගුණයක් දෙන්නේය. තවද නුඹලාට ආලෝකය දෙන්නේය. තවද නුඹලා එමගින් ගමන් කරන්නෙහුය. තවද නුඹලාට ක්ෂමාව දෙන්නේය. තවද සැබැවින්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

لِّئَلَّا يَعْلَمَ اَهْلُ الْكِتٰبِ اَلَّا يَقْدِرُوْنَ
عَلٰى شَيْءٍ مِّنْ فَضْلِ اللّٰهِ وَاَنَّ الْفَضْلَ
بِيَدِ اللّٰهِ يُؤْتِيْهِ مَنْ يَّشَآءُ ۗ وَاللّٰهُ
ذُو الْفَضْلِ الْعَظِيْمِ ﴿٣٠﴾

30. එය (විශ්වාසිතයින් වන) ඔවුන්ට අල්ලාහ්ගේ දයාවෙන් කිසිවක් ලබාගැනීමට බලයක් නැතැයි පුස්තකය ලද්දන් නොසිතනු පිණිසය. කෙසේ වුවද වරප්‍රසාද (සියල්ල) අල්ලාහ්ගේ අතෙහිය. ඔහු අභිමත අයට ඔහු එය දෙන්නේය. තවද අල්ලාහ් ඉමහත් වරප්‍රසාද ඇත්තාය.



අල් මුජාදලහ්
(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද, පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

قَدْ سَمِعَ اللّٰهُ قَوْلَ الَّتِيْ تُجَادِلُكَ فِيْ زَوْجِهَا وَتَشْتَكِيْٓ اِلَى اللّٰهِ ۖ وَاللّٰهُ يَسْمَعُ تَحَاوُرَكُمَا ۗ اِنَّ اللّٰهَ سَمِيْعٌۢ بَصِيْرٌ ②

28-කොටස

2. තම ස්වාමිපුරුෂයා ගැන ඔබ සමග තර්ක කරමින් අල්ලාහ් වෙත පැමිණිලි කළ ඇයගේ ප්‍රකාශය ඇත්තෙන්ම අල්ලාහ් ඇසුවේය. තවද අල්ලාහ් නුඹලා දෙදෙනාගේ සංවාදය ඇසුවේය. සැබැවින්ම අල්ලාහ් සියල්ල අසන්නාය, සියල්ල දකින්නාය.

اَلَّذِيْنَ يُظٰهِرُوْنَ مِنْكُمْ مِّنْ نِّسَآئِهِمْ مَّا هُنَّ اُمَّهٰتِهِمْ ۗ اِنْ اُمَّهٰتُهُمْ اِلَّا الّٰٓـِٔيْ وَلَدْنَهُمْ ۗ وَاِنَّهُمْ لَيَقُوْلُوْنَ مُنْكَرًا مِّنَ الْقَوْلِ وَزُوْرًا ۗ وَاِنَّ اللّٰهَ لَعَفُوٌّ غَفُوْرٌ ③

3. නුඹලාගෙන් කවුරුන් හෝ තම භාර්යයාවන්ට මව්වරුන් යැයි අමතන්නේද ඔවුන් මොවුන්ගේ මව්වරු නොවෙති. මොවුන්ගේ මව්වරුන් වන්නේ මොවුන්ව ප්‍රසූත කළ අය මිස නැත. තවද නිශ්චිතවම මොවුන් ඉතා නපුරු වූද අසත්‍ය වූද වදන් දොඩවන්නෝය. නමුත් නියතවශයෙන්ම අල්ලාහ් පව් මකා දමන්නාය, අතිශයින්ම ක්ෂමාන්විතය.

وَالَّذِيْنَ يُظٰهِرُوْنَ مِنْ نِّسَآئِهِمْ ثُمَّ يَعُوْدُوْنَ لِمَا قَالُوْا فَتَحْرِيْرُ رَقَبَةٍ مِّنْ قَبْلِ اَنْ يَّتَمَآسَّا ۗ ذٰلِكُمْ تُوْعَظُوْنَ بِهٖ ۗ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ خَبِيْرٌ ④

4. එමෙන්ම තම භාර්යයාවන්ට මව්වරුන් යැයි අමතා පසුව තමන් පැවසූ දේ වෙත (පසුතැවිලි වී) ආපසු හැරෙන්නන් ගත්කල ඔවුන් දෙදෙනා එකිනෙකා ස්පර්ශ කිරීමට මත්තෙන් (එයට වන්දියක් ලෙස ඔහු) වහලෙකුව මුදා හැරිය යුතුය. මෙය නුඹලාට කරනු ලබන අනුශාසනාවයි. තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් ඉතා විමසිලිමත්ය.

فَمَنْ لَّمْ يَجِدْ فَصِيَامُ شَهْرَيْنِ مُتَتَابِعَيْنِ مِنْ قَبْلِ اَنْ يَّتَمَآسَّا ۚ فَمَنْ لَّمْ يَسْتَطِعْ

5. නමුත් යමෙකුට (වහලෙකු) ලබා ගැනීමට හැකියාවක් නැත්තේද, ඔවුන් දෙදෙනා එකිනෙකා ස්පර්ශ කිරීමට මත්තෙන් ඔහු මාස දෙකක් නොකඩවා උපවාසයෙහි යෙදිය යුතුය. යමෙකුට

فَإِطْعَامُ سِتِّينَ مِسْكِينًا ۚ ذَٰلِكَ لِتُؤْمِنُوا بِاللَّهِ وَرَسُولِهِ ۚ وَتِلْكَ حُدُودُ اللَّهِ ۗ وَلِلْكَافِرِينَ عَذَابٌ أَلِيمٌ ﴿٥﴾

එසේ කිරීමටත් හැකියාවක් නැත්තේද (ඔහු) දුගීන් හැට දෙනෙකුට ආහාර දිය යුතුය. (මෙය) නුඹලා අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයාණන් කෙරෙහිද විශ්වාස කරනු පිණිසය. තවද අල්ලාහ්ගේ (නියම වූ) සීමාවන් මේවාය. තවද අවිශ්වාසිතයින්ට වේදනීය දඬුවමක් ඇත.

إِنَّ الَّذِينَ يُحَادُّونَ اللَّهَ وَرَسُولَهُ كُبِتُوا كَمَا كُبِتَ الَّذِينَ مِن قَبْلِهِمْ ۚ وَقَدْ أَنزَلْنَا آيَاتٍ بَيِّنَاتٍ ۚ وَلِلْكَافِرِينَ عَذَابٌ مُّهِينٌ ﴿٦﴾

6. නියතවශයෙන්ම අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට එරෙහි වන අය ගත්කල, ඔවුන්ට පෙර සිටි අය නින්දාවට ලක් වූ පරිදිම ඔවුන්ද නින්දාවට ලක් කරනු ලබන්නෝය. එමෙන්ම අපි දැනටමත් පැහැදිලි සළකුණු පහළ කර ඇත්තෙමු. තවද අවිශ්වාසිතයින්ට නින්දිත දඬුවමක් ලැබෙනු ඇත.

يَوْمَ يَبْعَثُهُمُ اللَّهُ جَمِيعًا فَيُنَبِّئُهُم بِمَا عَمِلُوا ۚ أَحْصَاهُ اللَّهُ وَنَسُوهُ ۚ وَاللَّهُ عَلَىٰ كُلِّ شَيْءٍ شَهِيدٌ ﴿٧﴾

7. අල්ලාහ් ඔවුන් සියල්ලව නැගිටුවන දිනයේදී ඔවුන් කළ දේ පිළිබඳව ඔහු ඔවුන්ට දන්වන්නේය. ඔවුන් එය අමතක කළද අල්ලාහ් ඒ පිළිබඳව ගණන් තබා ඇත්තේය. තවද අල්ලාහ් සියලු දේ කෙරෙහි සාක්ෂිකරුවෙක් වන්නේය.

أَلَمْ تَرَ أَنَّ اللَّهَ يَعْلَمُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۖ مَا يَكُونُ مِن نَّجْوَىٰ ثَلَاثَةٍ إِلَّا هُوَ رَابِعُهُمْ وَلَا خَمْسَةٍ إِلَّا هُوَ سَادِسُهُمْ وَلَا أَدْنَىٰ مِن ذَٰلِكَ وَلَا أَكْثَرَ إِلَّا هُوَ مَعَهُمْ أَيْنَ مَا كَانُوا ۖ ثُمَّ يُنَبِّئُهُم بِمَا عَمِلُوا يَوْمَ الْقِيَامَةِ ۚ إِنَّ اللَّهَ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿٨﴾

8. අහස්හි ඇති සියලු දේද පොළොවෙහි ඇති සියලු දේද අල්ලාහ් මැනවින් දන්නේයැයි ඔබ නොදැක්කෙහිද? තිදෙනෙකුගේ රහස් සාකච්ඡාවෙහි ඔවුන්ගෙන් සිව්වැන්නා ඔහු(අල්ලාහ්) හැර අන්කිසිවෙක් නැත. එමෙන්ම පස් දෙනෙකුගේ (රහස් සාකච්ඡාවෙහි) ඔවුන්ගෙන් සයවැන්නා ඔහු හැර අන්කිසිවෙක් නැත. තවද ඊටත් වඩා අඩු වුවද ඊටත් වඩා වැඩි වුවද ඔවුන් කොතැනක සිටියද ඔහුද ඔවුන් සමගය. පසුව පුනරුත්ථාන දිනයේදී ඔවුන් කළ දේ පිළිබඳව ඔහු ඔවුනට දන්වන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් සියලු දේ මැනැවින් දන්නේය.

9. රහසිගත කුමන්ත්‍රණය (කිරීම) තහනම් කරන ලද්දන්, පසුව ඔවුන් තහනම් කරන ලද දේ වෙතට ආපසු හැරී, පාපයටද සීමාව ඉක්මවීමටද දූතයාණන්ට අකීකරු වීමටද රහසිගතව කුමන්ත්‍රණය කරන අයව ඔබ දැක නොතිබේද? තවද ඔවුන් ඔබ වෙත පැමිණෙන කල්හි අල්ලාහ් ඔබට නොපැතූ ආකාරයෙන් ඔවුන් ඔබට සුභ පතති. නමුත් ඔවුන් තමන් අතර, 'අප පවසන දේ හේතුවෙන් අල්ලාහ් අප හට දඬුවම් නොකරන්නේ මන්දැ?'යි කියති. නිරයම ඔවුනට ප්‍රමාණවත්ය. ඔවුන් එහි දැවෙනු ඇත. තවද එය ඉතාමත් නපුරු නවාතැනකි!

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ نُهُوْا عَنِ النَّجْوٰى ثُمَّ يَعُوْدُوْنَ لِمَا نُهُوْا عَنْهُ وَيَتَنٰجَوْنَ بِالْاِثْمِ وَ الْعُدْوَانِ وَ مَعْصِيَتِ الرَّسُوْلِ ۫ وَاِذَا جَآءُوْكَ حَيَّوْكَ بِمَا لَمْ يُحَيِّكَ بِهِ اللّٰهُ ۙ وَيَقُوْلُوْنَ فِيْۤ اَنْفُسِهِمْ لَوْلَا يُعَذِّبُنَا اللّٰهُ بِمَا نَقُوْلُ ؕ حَسْبُهُمْ جَهَنَّمُ ۚ يَصْلَوْنَهَا ۚ فَبِئْسَ الْمَصِيْرُ ﴿٩﴾

10. එම්බල විශ්වාසිතයිනි! නුඹලා එකතු වී රහසිගතව සාකච්ඡා කරන කල්හි, පාපයටද සීමාව ඉක්මවීමටද දූතයාණන්ට අකීකරු වීමටද රහස් සාකච්ඡා නොකරනු. නමුත් යහපත හා බියබැතිමත්කම (ලබාගනු) පිණිස එක්ව සාකච්ඡා කරනු. තවද අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද නුඹලා (සියල්ල) එක්රැස් කරනු ලබන්නේ ඔහු වෙතටමය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِذَا تَنَاجَيْتُمْ فَلَا تَتَنَاجَوْا بِالْاِثْمِ وَالْعُدْوَانِ وَمَعْصِيَتِ الرَّسُوْلِ وَتَنَاجَوْا بِالْبِرِّ وَالتَّقْوٰى ؕ وَاتَّقُوا اللّٰهَ الَّذِيْۤ اِلَيْهِ تُحْشَرُوْنَ ﴿١٠﴾

11. (නපුරු අරමුණු සඳහා පවත්වන) රහස් කුමන්ත්‍රණය ෂෙයිතාන් වෙතින්ය. එය විශ්වාස කළ අයව ඔහු ශෝකයට පත් කරනු පිණිසය. නමුත් අල්ලාහ්ගේ අවසරයෙන් තොරව ඔවුනට කිසිදු හානියක් කිරීමට ඔහුට නොහැකිය. එමෙන්ම විශ්වාසිතයින් අල්ලාහ් කෙරෙහිම තම විශ්වාසය තැබිය යුතුය.

اِنَّمَا النَّجْوٰى مِنَ الشَّيْطٰنِ لِيَحْزُنَ الَّذِيْنَ اٰمَنُوْا وَلَيْسَ بِضَآرِّهِمْ شَيْــًٔا اِلَّا بِاِذْنِ اللّٰهِ ؕ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُوْنَ ﴿١١﴾

12. එම්බල විශ්වාසවන්තයිනි! (නුඹලාගේ) සභාවන්හි, 'ඉවත් වී ඉඩ දෙනු!'යි නුඹලාට පවසනු ලැබූවිට, ඉවත් වී ඉඩ දෙනු. අල්ලාහ් නුඹලා වෙනුවෙන් බොහෝ ඉඩකඩ ලබා දෙන්නේය. තවද 'නැගිටිනු!'යි

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِذَا قِيْلَ لَكُمْ تَفَسَّحُوْا فِى الْمَجٰلِسِ فَافْسَحُوْا يَفْسَحِ اللّٰهُ لَكُمْ ۚ وَاِذَا قِيْلَ انْشُزُوْا فَانْشُزُوْا يَرْفَعِ اللّٰهُ

ٱلَّذِينَ ءَامَنُوا۟ مِنكُمْ وَٱلَّذِينَ أُوتُوا۟ ٱلْعِلْمَ دَرَجَٰتٍ ۚ وَٱللَّهُ بِمَا تَعْمَلُونَ خَبِيرٌ ﴿١٢﴾

පවසනු ලැබුවිට, නැගිටිනු. නුඹලා අතරින් විශ්වාස කළ අයවත් දැනුම දෙනලද අයවත් අල්ලාහ් තරාතිරම්හි උසස් කරන්නේය. තවද අල්ලාහ් නුඹලා කරන දේ ගැන ඉතා විමසිලිමත්ය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوٓا۟ إِذَا نَٰجَيْتُمُ ٱلرَّسُولَ فَقَدِّمُوا۟ بَيْنَ يَدَىْ نَجْوَىٰكُمْ صَدَقَةً ۚ ذَٰلِكَ خَيْرٌ لَّكُمْ وَأَطْهَرُ ۚ فَإِن لَّمْ تَجِدُوا۟ فَإِنَّ ٱللَّهَ غَفُورٌ رَّحِيمٌ ﴿١٣﴾

13. එම්බල විශ්වාසිතයිනි! නුඹලා දූතයාණන් සමග පුද්ගලිකව සාකච්ඡා කරන කල්හි, එම සාකච්ඡාවට පෙර යමක් දන් දෙනු. එය නුඹලාට යහපත්ද පාරිශුද්ධද වේ. නමුත් නුඹලාට (දන් දීමට කිසිත්) නොමැති නම් (බිය නොවනු) අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

ءَأَشْفَقْتُمْ أَن تُقَدِّمُوا۟ بَيْنَ يَدَىْ نَجْوَىٰكُمْ صَدَقَٰتٍ ۚ فَإِذْ لَمْ تَفْعَلُوا۟ وَتَابَ ٱللَّهُ عَلَيْكُمْ فَأَقِيمُوا۟ ٱلصَّلَوٰةَ وَءَاتُوا۟ ٱلزَّكَوٰةَ وَأَطِيعُوا۟ ٱللَّهَ وَرَسُولَهُۥ ۚ وَٱللَّهُ خَبِيرٌۢ بِمَا تَعْمَلُونَ ﴿١٤﴾

14. නුඹලා පුද්ගලිකව සාකච්ඡා කිරීමට පෙර දන් දීමෙහි නුඹලා බිය වන්නෙහුද? නමුත් නුඹලා එසේ නොකළාවුවද අල්ලාහ් නුඹලාට ක්ෂමා කර ඇත්තේය. එබැවින් නුඹලා නමස්කාරයෙහි නිරත වනු. තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු. තවද අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද කීකරු වනු. තවද අල්ලාහ් නුඹලා කරන සියළු දේ ගැන ඉතා විමසිලිමත්ය.

أَلَمْ تَرَ إِلَى ٱلَّذِينَ تَوَلَّوْا۟ قَوْمًا غَضِبَ ٱللَّهُ عَلَيْهِم مَّا هُم مِّنكُمْ وَلَا مِنْهُمْ وَيَحْلِفُونَ عَلَى ٱلْكَذِبِ وَهُمْ يَعْلَمُونَ ﴿١٥﴾

15. අල්ලාහ්ගේ කෝපයට පත් වූ ජනතාව සමග මිත්‍රකම් පවත්වන අයව ඔබ නොදුටුවෙහිද? මොවුන් නුඹලාගේද නොවෙති. ඔවුන්ගේද නොවෙති. තවද ඔවුන් දැනදැනම අසත්‍යය මත දිවුරති.

أَعَدَّ ٱللَّهُ لَهُمْ عَذَابًا شَدِيدًا ۖ إِنَّهُمْ سَآءَ مَا كَانُوا۟ يَعْمَلُونَ ﴿١٦﴾

16. අල්ලාහ් ඔවුනට දැඩි දඬුවමක් පිළියෙල කර ඇත්තේය. නියතවශයෙන්ම ඔවුන් කරමින් සිටි දේ ඉතා නපුරුය.

اِتَّخَذُوْٓا اَيْمَانَهُمْ جُنَّةً فَصَدُّوْا عَنْ سَبِيْلِ اللّٰهِ فَلَهُمْ عَذَابٌ مُّهِيْنٌ ﴿١٧﴾

17. ඔවුන් තමන්ගේ දිවුරුම් (ඔවුන්ගේ වැරදි ක්‍රියාවන්ට) පළිහයක් කර ගෙන (එමගින් මිනිසුන්ව) අල්ලාහ්ගේ මාර්ගයෙන් වළක්වන්නෝය. එබැවින් ඔවුනට නින්දිත දඬුවමක් ඇත.

لَنْ تُغْنِيَ عَنْهُمْ اَمْوَالُهُمْ وَلَآ اَوْلَادُهُمْ مِّنَ اللّٰهِ شَيْـًٔا ؕ اُولٰٓئِكَ اَصْحٰبُ النَّارِ ؕ هُمْ فِيْهَا خٰلِدُوْنَ ﴿١٨﴾

18. ඔවුන්ගේ වස්තුන් හෝ ඔවුන්ගේ දරුවන් හෝ අල්ලාහ්ට එරෙහිව ඔවුනට කිසිදු ඵලක් නොවනු ඇත. ගින්නෙහි සහකරුවන් ඔවුන්මය, ඔවුන් එහිම දිගුකල් වෙසෙන්නෝය.

يَوْمَ يَبْعَثُهُمُ اللّٰهُ جَمِيْعًا فَيَحْلِفُوْنَ لَهٗ كَمَا يَحْلِفُوْنَ لَكُمْ وَيَحْسَبُوْنَ اَنَّهُمْ عَلٰى شَيْءٍ ؕ اَلَآ اِنَّهُمْ هُمُ الْكٰذِبُوْنَ ﴿١٩﴾

19. අල්ලාහ් ඔවුන් සියල්ලව නැගිටුවන දින(යේදී) ඔවුන් නුඹලාට දිවිරන්නා සේ ඔහුටද දිවිරන්නෝය. තවද ඔවුන්ට යම්(ස්ථාවරයක්) ඇතැයිද ඔවුන් සිතන්නෝය. අවධාරණයයි! නියතවශයෙන්ම ඔවුන්ම මුසාවාදීන් වන්නෝය.

اِسْتَحْوَذَ عَلَيْهِمُ الشَّيْطٰنُ فَاَنْسٰهُمْ ذِكْرَ اللّٰهِ ؕ اُولٰٓئِكَ حِزْبُ الشَّيْطٰنِ ؕ اَلَآ اِنَّ حِزْبَ الشَّيْطٰنِ هُمُ الْخٰسِرُوْنَ ﴿٢٠﴾

20. ෂෙයිතාන් ඔවුන් මත ජය ලබාගෙන අල්ලාහ්ව සිහිකිරීම ඔවුනට අමතක කරවිය. ෂෙයිතාන්ගේ පාර්ශවය වන්නේ ඔවුන්මය. අවධාරණයයි! නියතවශයෙන්ම ෂෙයිතාන්ගේ පාර්ශවය පාඩු විඳින්නන්මය.

اِنَّ الَّذِيْنَ يُحَآدُّوْنَ اللّٰهَ وَرَسُوْلَهٗٓ اُولٰٓئِكَ فِي الْاَذَلِّيْنَ ﴿٢١﴾

21. නිශ්චිතවම අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට එරෙහි වන්නන් ඉතා නින්දිත අය අතරෙහි වන්නෝය.

كَتَبَ اللّٰهُ لَاَغْلِبَنَّ اَنَا وَرُسُلِيْ ؕ اِنَّ اللّٰهَ قَوِيٌّ عَزِيْزٌ ﴿٢٢﴾

22. 'මාත් මාගේ දූතයිනුත් නිශ්චිතවම ජයග්‍රහණය කරන්නෙමු'යි අල්ලාහ් නියම කර ඇත්තේය. සැබැවින්ම අල්ලාහ් ශක්තිසම්පන්නය, බලසම්පන්නය.

لَا تَجِدُ قَوْمًا يُّؤْمِنُوْنَ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ يُوَآدُّوْنَ مَنْ حَآدَّ اللّٰهَ وَرَسُوْلَهٗ

23. අල්ලාහ් කෙරෙහිද අවසාන දිනය කෙරෙහිද විශ්වාස කරන අය අතුරෙහි අල්ලාහ්ට සහ ඔහුගේ දූතයාණන්ට විරුද්ධ වන

وَلَوْ كَانُوْٓا اٰبَآءَهُمْ اَوْ اَبْنَآءَهُمْ اَوْ
اِخْوَانَهُمْ اَوْ عَشِيْرَتَهُمْ ؕ اُولٰٓـئِكَ كَتَبَ
فِىْ قُلُوْبِهِمُ الْاِيْمَانَ وَاَيَّدَهُمْ بِرُوْحٍ
مِّنْهُ ؕ وَيُدْخِلُهُمْ جَنّٰتٍ تَجْرِىْ مِنْ
تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَا ؕ رَضِىَ اللّٰهُ
عَنْهُمْ وَرَضُوْا عَنْهُ ؕ اُولٰٓـئِكَ حِزْبُ اللّٰهِ ؕ
اَلَاۤ اِنَّ حِزْبَ اللّٰهِ هُمُ الْمُفْلِحُوْنَ ﴿٢٢﴾ ع

අයව ප්‍රිය කරන ජනයින් ඔබ නොදකින්නෙහිය. (විරුද්ධවන) ඔවුන් (විශ්වාසිත) මොවුන්ගේ පියවරුන් වුවත් මොවුන්ගේ පුතුන් වුවත් මොවුන්ගේ සොහොයුරන් වුවත් මොවුන්ගේ නෑසියන් වුවත්ය. මොවුන්ගේ හදවත්හි ඔහු (සැබෑ) විශ්වාසය සනිටුහන් කොට ඔහුගේ පිහිටෙන් මොවුන්ව ශක්තිමත් කළේය. එතුලින් ගලා බසිනා ගංගාවලින් යුත් උද්‍යානයන්හි ඔහු මොවුන්ව ඇතුළු කරවන්නේය. මොවුන් එහි සදාකල් වෙසෙන්නෝය. අල්ලාහ් මොවුන්ගෙන් බෙහෙවින් තෘප්තිමත් වී ඇත. එමෙන්ම මොවුන්ද ඔහුගෙන් බෙහෙවින් තෘප්තිමත් වී ඇත. අල්ලාහ්ගේ පාර්ශවය වන්නේ මොවුන්මය. (එම්බල ජනතාවනි!) සවන් දෙනු! ජයග්‍රාහකයන් වන්නේ අල්ලාහ්ගේ පාර්ශවයම වේ.



අල් හෂ්ර්
(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

سَبَّحَ لِلّٰهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْاَرْضِ ۚ وَهُوَ الْعَزِيْزُ الْحَكِيْمُ ②

2. අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද අල්ලාහ්ව සුවිශුද්ධ කරයි. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

هُوَ الَّذِيْٓ اَخْرَجَ الَّذِيْنَ كَفَرُوْا مِنْ اَهْلِ الْكِتٰبِ مِنْ دِيَارِهِمْ لِاَوَّلِ الْحَشْرِ ۭ مَا ظَنَنْتُمْ اَنْ يَّخْرُجُوْا وَظَنُّوْٓا اَنَّهُمْ مَّانِعَتُهُمْ حُصُوْنُهُمْ مِّنَ اللّٰهِ فَاَتٰىهُمُ اللّٰهُ مِنْ حَيْثُ لَمْ يَحْتَسِبُوْا ۤ وَقَذَفَ فِيْ قُلُوْبِهِمُ الرُّعْبَ يُخْرِبُوْنَ بُيُوْتَهُمْ بِاَيْدِيْهِمْ وَاَيْدِي الْمُؤْمِنِيْنَ ۤ فَاعْتَبِرُوْا يٰٓاُولِي الْاَبْصَارِ ③

3. පුස්තකය හිමි අය අතරින් අවිශ්වාස කළවුන්ව ප්‍රථම වරට පිටුවහල් කරන අවස්ථාවේදී ඔවුන්ගේ නිවැස්වලින් පිටත්ව යෑමට සැලැස්වූයේ ඔහුමය. ඔවුන් පිටව යනු ඇතැයි නුඹලා නොසිතුවෙහුය. තවද අල්ලාහ්ට එරෙහිව ඔවුන්ගේ බලකොටු ඔවුන්ව ආරක්ෂා කරනු ඇතැයි ඔවුන් සිතූහ. නමුත් ඔවුන් නොසිතූ තැනකින් අල්ලාහ් ඔවුන්ව වටලාගත් අතර ඔවුන්ගේ සිත්හි භීතියක්ද ඇති කළේය. එබැවින් ඔවුන් තමන්ගේම අත්වලින්ද විශ්වාසිතයින්ගේ අත්වලින්ද තම නිවෙස් විනාශ කර ගත්හ. එබැවින්, එම්බල නුවන ඇත්තවුනි! පාඩමක් ඉගෙන ගනිව්.

وَلَوْلَآ اَنْ كَتَبَ اللّٰهُ عَلَيْهِمُ الْجَلَاۗءَ لَعَذَّبَهُمْ فِي الدُّنْيَا ۭ وَلَهُمْ فِي الْاٰخِرَةِ عَذَابُ النَّارِ ④

4. තවද ඔවුන්ව පිටුවහල් කිරීමට අල්ලාහ් නියම නොකළේ නම්, නියතවශයෙන්ම ඔහු ඔවුනට (වෙනත් ආකාරයකින්) මෙලොවෙහිදීම දඬුවම් කිරීමට තිබුණි. තවද පරලොවෙහිදී නිශ්චිතවම ඔවුනට ගින්නෙහි දඬුවම ලැබෙනු ඇත.

ذٰلِكَ بِاَنَّهُمْ شَاۗقُّوا اللّٰهَ وَرَسُوْلَهٗ ۚ وَمَنْ يُّشَاۗقِّ اللّٰهَ فَاِنَّ اللّٰهَ شَدِيْدُ الْعِقَابِ ⑤

5. එය මන්දයත්, ඔවුන් අල්ලාහ්ටත් ඔහුගේ දූතයාණන්ටත් විරුද්ධ වූ හෙයිනි. තවද කවුරුන් හෝ අල්ලාහ්ට විරුද්ධ වන්නේද එවිට අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

6. කුමන රටඉඳි ගස් නුඹලා කපා දැමුවා වුවද, නැතහොත් ඒවා තම මුල් වලින් සිටින්නට ඉඩ හැරියා වුවද, එය අල්ලාහ්ගේ නියමය පරිදිය. තවද එය ඔහු සීමාව ඉක්මවන්නන්ව නින්දාවට පත් කරනු පිණිසය.

مَا قَطَعْتُمْ مِّنْ لِّيْنَةٍ اَوْ تَرَكْتُمُوْهَا قَآئِمَةً عَلٰٓى اُصُوْلِهَا فَبِاِذْنِ اللّٰهِ وَلِيُخْزِيَ الْفٰسِقِيْنَ ۝٦

7. අල්ලාහ් ඔහුගේ දූතයාණන්ට (යුද්ධයේදී) අත්පත් වූ වස්තූන් (ලබා ගැනීම) කෙරෙහි, නුඹලා අශ්වයෙකු හෝ ඔටුවෙකු හෝ දක්කාගෙන නොගියෙහුය. නමුත් අල්ලාහ් ඔහු කැමති ඕනෑම කෙනෙකු මත ඔහුගේ දූතයින්ට බලය පවරන්නේය. තවද අල්ලාහ්ට සියළු දේ කෙරෙහි බලය ඇත.

وَمَآ اَفَآءَ اللّٰهُ عَلٰى رَسُوْلِهٖ مِنْهُمْ فَمَآ اَوْجَفْتُمْ عَلَيْهِ مِنْ خَيْلٍ وَّلَا رِكَابٍ وَّلٰكِنَّ اللّٰهَ يُسَلِّطُ رُسُلَهٗ عَلٰى مَنْ يَّشَآءُ ؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَىْءٍ قَدِيْرٌ ۝٧

8. නගරයන්හි ජනතාවගෙන් අල්ලාහ් ඔහුගේ දූතයාණන්ට ලබා දුන් (යුද්ධයේදී) අත්පත් වූ වස්තූන්, අල්ලාහ්ටද, ඔහුගේ දූතයාණන්ටද, සමීප ඥාතීන්ටද අනාථයින්ටද අවශ්‍යතාවයෙන් පෙළෙන්නන්ටද, මගියන්ටද අයත් වන අතර එය නුඹලාගෙන් ධනවතුන් අතරම සංසරණය වීමට නොවේ. තවද දූතයාණන් නුඹලාට යමක් දුන්නේ නම්, එය ලබාගනු. තවද යමක් ඔහු නුඹලාට තහනම් කළේ නම් (එයින්) වැළකෙනු. තවද අල්ලාහ්ට බියබැතිමත් වනු. නියතවශයෙන්ම අල්ලාහ් දඬුවම් දීමෙහි ඉතා දැඩිය.

مَآ اَفَآءَ اللّٰهُ عَلٰى رَسُوْلِهٖ مِنْ اَهْلِ الْقُرٰى فَلِلّٰهِ وَلِلرَّسُوْلِ وَلِذِى الْقُرْبٰى وَالْيَتٰمٰى وَالْمَسٰكِيْنِ وَابْنِ السَّبِيْلِ ۙ كَىْ لَا يَكُوْنَ دُوْلَةًۢ بَيْنَ الْاَغْنِيَآءِ مِنْكُمْ ؕ وَمَآ اٰتٰىكُمُ الرَّسُوْلُ فَخُذُوْهُ ۚ وَمَا نَهٰىكُمْ عَنْهُ فَانْتَهُوْا ۚ وَاتَّقُوا اللّٰهَ ؕ اِنَّ اللّٰهَ شَدِيْدُ الْعِقَابِ ۝٨

9. (යුද්ධයේදී අත්පත් වූ වස්තූන්) තමන්ගේ නිවැස්වලින්ද තමන්ගේ දේපළ වලින්ද පලවාහරින ලද දුගී සරණාගතයින්ටත්ය. ඔවුන් අල්ලාහ්ගේ වරප්‍රසාදය සහ (ඔහුගේ) සොම්නස පතමින් අල්ලාහ්ටත් ඔහුගේ දූතයාණන්ටත් උදව් කරමින් සිටිති. (තම විශ්වාසයෙහි) සත්‍යවාදීන් වන්නේ මොවුන්මය.

لِلْفُقَرَآءِ الْمُهٰجِرِيْنَ الَّذِيْنَ اُخْرِجُوْا مِنْ دِيَارِهِمْ وَاَمْوَالِهِمْ يَبْتَغُوْنَ فَضْلًا مِّنَ اللّٰهِ وَرِضْوَانًا وَّيَنْصُرُوْنَ اللّٰهَ وَرَسُوْلَهٗ ؕ اُولٰٓئِكَ هُمُ الصّٰدِقُوْنَ ۝٩

وَالَّذِيْنَ تَبَوَّؤُ الدَّارَ وَالْاِيْمَانَ مِنْ قَبْلِهِمْ يُحِبُّوْنَ مَنْ هَاجَرَ اِلَيْهِمْ وَلَا يَجِدُوْنَ فِيْ صُدُوْرِهِمْ حَاجَةً مِّمَّآ اُوْتُوْا وَيُؤْثِرُوْنَ عَلٰٓى اَنْفُسِهِمْ وَلَوْ كَانَ بِهِمْ خَصَاصَةٌ ؕ وَمَنْ يُّوْقَ شُحَّ نَفْسِهٖ فَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ۚ﴿۱۰﴾

10. තවද, මෙම නගරයෙහි ඔවුන්ට පෙර (තම) නිවැස් තනාගෙන විශ්වාසයෙහි සිටියා වූ මොවුන් සරණාපතා තමන් වෙත පැමිණෙන ඔවුන්ව ප්‍රිය කරන්නෝය. තවද, ඔවුන්ට දෙන ලද දේවල් කෙරෙහි තම සිත්හි කිසිදු ආශාවක් මොවුන් නොදක්වන්නෝය. එහෙත් (මොවුන් අතර) දිළිඳුකම තිබියදී තමන්ට වඩා සරණාගතයින්ට ප්‍රමුඛත්වය දෙන්නෝය. තවද, කවුරුන්හෝ තම සිත්හි ඇති තන්හාවෙන් මිදුනේද, ජයග්‍රාහිකයන් වන්නේ ඔවුන්මය.

وَالَّذِيْنَ جَآءُوْ مِنْۢ بَعْدِهِمْ يَقُوْلُوْنَ رَبَّنَا اغْفِرْ لَنَا وَلِاِخْوَانِنَا الَّذِيْنَ سَبَقُوْنَا بِالْاِيْمَانِ وَلَا تَجْعَلْ فِيْ قُلُوْبِنَا غِلًّا لِّلَّذِيْنَ اٰمَنُوْا رَبَّنَآ اِنَّكَ رَءُوْفٌ رَّحِيْمٌ ﴿۱۱﴾

11. එමෙන්ම (යුද්ධයේදී අත්පත් වූ වස්තූන්) ඔවුනට පසු පැමිණි අයටත්ය. ඔවුන්, ‘අපගේ අධිපතියාණෙනි! අප හටද, අපට පෙර විශ්වාස කළ අපගේ සහෝදරයින්ටද, ක්ෂමාව දෙනු මැනව. තවද, විශ්වාස කළ අයට එරෙහිව අප සිත්හි කිසිදු වෛරයක් නොතබනු මැනව. අපගේ අධිපතියාණෙනි! ඇත්තෙන්ම ඔබ අතිශයින්ම සානුකම්පිතය, පරම දයාබරයා’යි කියන්නෝය.

اَلَمْ تَرَ اِلَى الَّذِيْنَ نَافَقُوْا يَقُوْلُوْنَ لِاِخْوَانِهِمُ الَّذِيْنَ كَفَرُوْا مِنْ اَهْلِ الْكِتٰبِ لَئِنْ اُخْرِجْتُمْ لَنَخْرُجَنَّ مَعَكُمْ وَلَا نُطِيْعُ فِيْكُمْ اَحَدًا اَبَدًا ۙ وَّاِنْ قُوْتِلْتُمْ لَنَنْصُرَنَّكُمْ ؕ وَاللّٰهُ يَشْهَدُ اِنَّهُمْ لَكٰذِبُوْنَ ﴿۱۲﴾

12. කුහකයින් වන ඔවුන්ව ඔබ දැක නොතිබේද? ඔවුන් පුස්තකය හිමි අය අතුරින් අවිශ්වාස කළ ඔවුන්ගේ සහෝදරයින්ට, ‘නුඹලා පිටුවහල් කරනු ලැබුවහොත් අපිද නුඹලා සමග පිටවන්නෙමු. තවද, නුඹලාට විරුද්ධව කිසිවෙකුටත් කිසිවිටෙකත් අපි අවනත නොවන්නෙමු. නුඹලාට එරෙහිව සටන් කරනු ලැබුවහොත් අපි නුඹලාට නිශ්චිතවම උදව් කරන්නෙමු’යි පවසන්නෝය. නමුත් නියතවශයෙන්ම ඔවුන් මුසාවාදීන් යැයි අල්ලාහ් සාක්ෂි දරන්නේය.

لَئِنْ اُخْرِجُوْا لَا يَخْرُجُوْنَ مَعَهُمْ ۚ وَلَئِنْ قُوْتِلُوْا لَا يَنْصُرُوْنَهُمْ ۚ وَلَئِنْ

13. (පුස්තක හිමියන් වන) ඔවුන් පිටුවහල් කරනු ලැබුවහොත්, (කුහකයින් වන) මොවුන් කිසිවිටෙකත් ඔවුන් සමග පිටව නොයන්නෝය.

نَّصَرُوهُمْ لَيُوَلُّنَّ الْأَدْبَارَ ثُمَّ لَا يُنصَرُونَ ﴿١٣﴾

තවද ඔවුන්ට විරුද්ධව සටන් කරනු ලැබුවහොත් මොවුන් කිසිවිටෙකත් ඔවුනට උදව් නොකරන්නෝය. මොවුන් ඔවුන්ට උදව් කළද මොවුන් පිටුපා පලායන්නෝය. තවද මොවුන් උදව් කරනු නොලබන්නෝය.

لَأَنتُمْ أَشَدُّ رَهْبَةً فِي صُدُورِهِم مِّنَ اللَّهِ ۚ ذَٰلِكَ بِأَنَّهُمْ قَوْمٌ لَّا يَفْقَهُونَ ﴿١٤﴾

14. නියතවශයෙන්ම මොවුන්ගේ හදවත් තුල අල්ලාහ්ට වඩා නුඹලා කෙරෙහි අධික බියක් ඇත. මක්නිසාදයත් මොවුන් දැනුම් තේරුම් (කිසිවක්) නොමැති ජනතාවක් වන බැවිනි.

لَا يُقَاتِلُونَكُمْ جَمِيعًا إِلَّا فِي قُرًى مُّحَصَّنَةٍ أَوْ مِن وَرَاءِ جُدُرٍ ۚ بَأْسُهُم بَيْنَهُمْ شَدِيدٌ ۚ تَحْسَبُهُمْ جَمِيعًا وَقُلُوبُهُمْ شَتَّىٰ ۚ ذَٰلِكَ بِأَنَّهُمْ قَوْمٌ لَّا يَعْقِلُونَ ﴿١٥﴾

15. මොවුන් එකමුතු වී බලකොටු ආශ්‍රිත නගරයන්හි සිට හෝ පවුරු වලට පිටුපසින් සිට හෝ මිස නුඹලාට විරුද්ධව සටන් නොවදින්නෝය. මොවුනතර මොවුන්ගේ සටන ඉතා දැඩිය. මොවුන් එකමුතු යැයි ඔබ සිතුවද මොවුන්ගේ හදවත් භේද බින්න වී ඇත. ඒ මන්දයත් මොවුන් අවබෝධයක් නොමැති ජනතාවක් වන බැවිනි.

كَمَثَلِ الَّذِينَ مِن قَبْلِهِمْ قَرِيبًا ۖ ذَاقُوا وَبَالَ أَمْرِهِمْ وَلَهُمْ عَذَابٌ أَلِيمٌ ﴿١٦﴾

16. (මොවුන්ගේ උපමාව නම්) මොවුන්ට ටික කලකට පෙර සිටි තමන්ගේ ක්‍රියාවන්හි නපුරු ප්‍රතිවිපාකයන් අත් වින්දාවූ අයගේ උපමාවට සමානය. තවද මොවුනට වේදනීය දඬුවමක් ඇත.

كَمَثَلِ الشَّيْطَانِ إِذْ قَالَ لِلْإِنسَانِ اكْفُرْ فَلَمَّا كَفَرَ قَالَ إِنِّي بَرِيءٌ مِّنكَ إِنِّي أَخَافُ اللَّهَ رَبَّ الْعَالَمِينَ ﴿١٧﴾

17. (කුහකයින්) ෂෙයිතාන් මෙන්ය. (ඔහු) මිනිසාට, 'අවිශ්වාස කරනු'යි කියන්නේය. පසුව ඔහු(මිනිසා) අවිශ්වාස කළ කල්හි, ඔහු (ෂෙයිතාන්), 'මා නුඹගෙන් නිදහස් වන්නෙමි. නියතවශයෙන්ම සර්ව ලෝකයන්ටම අධිපතියාණන් වන අල්ලාහ්ට මා බිය වන්නෙමි'යි කියන්නේය.

فَكَانَ عَاقِبَتَهُمَا أَنَّهُمَا فِي النَّارِ خَالِدَيْنِ فِيهَا ۚ وَذَٰلِكَ جَزَاءُ الظَّالِمِينَ ﴿١٨﴾

18. තවද ඔවුන් දෙදෙනාගේ අවසානය කුමක්දයත් ඔවුන් දෙදෙනා ගින්නෙහිය. ඔවුන් එහි දිගුකල් වෙසෙති. වැරදිකරන්නන් සඳහා වන තිළිණය මෙය වේ.

19. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද සෑම ආත්මයක්ම හෙට දිනය වෙනුවෙන් තමා කුමක් යවා ඇත්දැයි අවධානය කරත්වා. තවද අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. නියතවශයෙන්ම අල්ලාහ් නුඹලා කරන දේ ගැන ඉතා විමසිලිමත්ය.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ ٱتَّقُوا۟ ٱللَّهَ وَلْتَنظُرْ نَفْسٌ مَّا قَدَّمَتْ لِغَدٍ ۖ وَٱتَّقُوا۟ ٱللَّهَ ۚ إِنَّ ٱللَّهَ خَبِيرٌۢ بِمَا تَعْمَلُونَ ﴿١٩﴾

20. තවද අල්ලාහ්ව අමතක කළ අය මෙන් නොවනු. එමනිසා ඔහු ඔවුනට ඔවුන්වම අමතක කරවීමට සැලැස්වීය. කැරලිකරුවන් වන්නේ ඔවුන්මය.

وَلَا تَكُونُوا۟ كَٱلَّذِينَ نَسُوا۟ ٱللَّهَ فَأَنسَىٰهُمْ أَنفُسَهُمْ ۚ أُو۟لَٰٓئِكَ هُمُ ٱلْفَٰسِقُونَ ﴿٢٠﴾

21. නිරයේ වෙසෙන්නන්ද ස්වර්ගයේ වෙසෙන්නන්ද එකසමාන නොවෙති. ස්වර්ගයේ වෙසෙන්නන්ම ජය ලබන්නෝය.

لَا يَسْتَوِىٓ أَصْحَٰبُ ٱلنَّارِ وَأَصْحَٰبُ ٱلْجَنَّةِ ۚ أَصْحَٰبُ ٱلْجَنَّةِ هُمُ ٱلْفَآئِزُونَ ﴿٢١﴾

22. අප මෙම කුර්ආනය කන්දක් මත පහළ කළේ නම්, එය යටහත් පහත් වෙමින් අල්ලාහ්ට ඇති බියෙන් සුනුවිසුණු වී යනු නිශ්චිතවම ඔබ දකින්නෙහිය. තවද ඔවුන් මෙනෙහි කරනු පිණිස අප මිනිසුන් හට ගෙනහැර පාන උපමාවන් මේවාය.

لَوْ أَنزَلْنَا هَٰذَا ٱلْقُرْءَانَ عَلَىٰ جَبَلٍ لَّرَأَيْتَهُۥ خَٰشِعًا مُّتَصَدِّعًا مِّنْ خَشْيَةِ ٱللَّهِ ۚ وَتِلْكَ ٱلْأَمْثَٰلُ نَضْرِبُهَا لِلنَّاسِ لَعَلَّهُمْ يَتَفَكَّرُونَ ﴿٢٢﴾

23. ඔහු අල්ලාහ්ය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙක් නැත. අදෘශ්‍යමානයද දෘශ්‍යමානයද දත්තාය. ඔහු මහා කාරුණිකය, පරම දයාබරය.

هُوَ ٱللَّهُ ٱلَّذِى لَآ إِلَٰهَ إِلَّا هُوَ ۖ عَٰلِمُ ٱلْغَيْبِ وَٱلشَّهَٰدَةِ ۖ هُوَ ٱلرَّحْمَٰنُ ٱلرَّحِيمُ ﴿٢٣﴾

24. ඔහු අල්ලාහ්ය. නැමදීමට සුදුස්සා ඔහු හැර අන් කිසිවෙක් නැත. ස්වාධිපත්‍යයාය, සුවිශුද්ධය, සාමයේ ප්‍රභවයාය, සර්ව ආරක්ෂකයාය, පරිසංරක්ෂකයාය, බලසම්පන්නය, වික්‍රමාන්විතය, මහෝදාරය. ඔවුන් (ඔහුට) සමාන තබන දෙයට වඩා අල්ලාහ් පරිශුද්ධය.

هُوَ ٱللَّهُ ٱلَّذِى لَآ إِلَٰهَ إِلَّا هُوَ ٱلْمَلِكُ ٱلْقُدُّوسُ ٱلسَّلَٰمُ ٱلْمُؤْمِنُ ٱلْمُهَيْمِنُ ٱلْعَزِيزُ ٱلْجَبَّارُ ٱلْمُتَكَبِّرُ ۚ سُبْحَٰنَ ٱللَّهِ عَمَّا يُشْرِكُونَ ﴿٢٤﴾

هُوَ اللّٰهُ الْخَالِقُ الْبَارِئُ الْمُصَوِّرُ لَهُ الْاَسْمَآءُ الْحُسْنٰى ؕ يُسَبِّحُ لَهٗ مَا فِى السَّمٰوٰتِ وَالْاَرْضِ ۚ وَهُوَ الْعَزِيْزُ الْحَكِيْمُ ﴿٢٥﴾

25. ඔහු අල්ලාහ්ය, මැවුම්කරුවාණන්ය, උත්පාදකයාය, හැඩගන්වන්නාය, ඉතා අලංකාර නාමයන් ඔහු සතුය. අහස් සහ පොළොවෙහි ඇති සියල්ල ඔහුව සුවිශුද්ධ කරයි. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.




## අල් මුම්තහිනත්

(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰٓاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَتَّخِذُوْا عَدُوِّيْ وَعَدُوَّكُمْ اَوْلِيَآءَ تُلْقُوْنَ اِلَيْهِمْ بِالْمَوَدَّةِ وَقَدْ كَفَرُوْا بِمَا جَآءَكُمْ مِّنَ الْحَقِّ ۚ يُخْرِجُوْنَ الرَّسُوْلَ وَاِيَّاكُمْ اَنْ تُؤْمِنُوْا بِاللّٰهِ رَبِّكُمْ ۗ اِنْ كُنْتُمْ خَرَجْتُمْ جِهَادًا فِيْ سَبِيْلِيْ وَابْتِغَآءَ مَرْضَاتِيْ ۚ تُسِرُّوْنَ اِلَيْهِمْ بِالْمَوَدَّةِ ۚ وَاَنَا اَعْلَمُ بِمَآ اَخْفَيْتُمْ وَمَآ اَعْلَنْتُمْ ۗ وَمَنْ يَّفْعَلْهُ مِنْكُمْ فَقَدْ ضَلَّ سَوَآءَ السَّبِيْلِ ②

2. විශ්වාසිනයිනි! නුඹලා මාගේ සතුරන්ද නුඹලාගේ සතුරන්ද මිතුරන් කර නොගනිව්. නුඹලා වෙත පැමිණි සත්‍යය, ඔවුන් ප්‍රතික්ෂේප කර තිබියදීත් නුඹලා ඔවුනට ස්නේහය දක්වන්නෙහුය. නුඹලා නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ්ව විශ්වාස කළ හේතුවෙන් පමණක්ම දූතයාණන්වද නුඹලාවද නුඹලාගේ නිවෙස්වලින් ඔවුන් පිටුවහල් කරන්නෝය. නුඹලා මාගේ මාර්ගයෙහි දැඩි පරිශ්‍රමයෙහි යෙදෙමින් මාගේ සොම්නස පතා පිටව ගියහොත් නුඹලා අතර සමහරුන් ඔවුනට රහසිගතව ස්නේහයේ (පුවත) දන්වන්නෝය. එමෙන්ම නුඹලා සඟවන දේද නුඹලා හෙලි කරන දේද මම මැනැවින් දනිමි. තවද නුඹලාගෙන් කවුරුන්හෝ එසේ කරන්නේ නම් නියතවශයෙන්ම ඔහු යහමාර්ගයෙන් නොමග ගොස්ය.

اِنْ يَّثْقَفُوْكُمْ يَكُوْنُوْا لَكُمْ اَعْدَآءً وَّيَبْسُطُوْٓا اِلَيْكُمْ اَيْدِيَهُمْ وَاَلْسِنَتَهُمْ بِالسُّوْٓءِ وَوَدُّوْا لَوْ تَكْفُرُوْنَ ۗ ③

3. තවද ඔවුන් නුඹලා කෙරෙහි අභිබවා සිටියේ නම් ඔවුන් නුඹලාට (ප්‍රකට) සතුරන් වී ඔවුන්ගේ අත්ද ඔවුන්ගේ දිව්ද නපුරු (අදහසින්) නුඹලා වෙත දික්කරන්නෝය. තවද නුඹලා අවිශ්වාස කරන්නන් වීමට ඔවුන් අතිශයින්ම ලැදි වන්නෝය.

لَنْ تَنْفَعَكُمْ اَرْحَامُكُمْ وَلَآ اَوْلَادُكُمْ ۚ يَوْمَ الْقِيٰمَةِ ۚ يَفْصِلُ بَيْنَكُمْ ۗ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ④

4. තවද නුඹලාගේ සමීප ඥාතීන්ද නුඹලාගේ දරුවන්ද පුනරුත්ථාන දිනයේදී නුඹලාට කිසිදු ඵලක් නොවන්නෝය. ඔහු නුඹලා අතර තීරණය කරන්නේය. තවද නුඹලා කරන සියළු දේ අල්ලාහ් දකින්නේය.

5. නියතවශයෙන්ම නුඹලාට ඉබ්රාහිම් සහ ඔහු සමග වූ අය වෙත යහපත් ආදර්ශයක් ඇත. ඔවුන් තම ජනතාව වෙත, 'නියතවශයෙන්ම අපි නුඹලාගෙන්ද අල්ලාහ් හැර නුඹලා නමදින දෙයින්ද වැළකී සිටින්නෙමු. නුඹලා (විශ්වාස) කරන සියලු දේ අපි ප්‍රතික්ෂේප කරන්නෙමු. නුඹලා එකම අල්ලාහ් කෙරෙහි පමණක් විශ්වාස කරන තාක් නුඹලා සහ අප අතර සතුරුකමද ද්වේෂයද සදහටම මතුවී ඇත'යි කීවෝය. එහෙත් 'නියතවශයෙන්ම මම ඔබ සඳහා ක්ෂමාව අයැදින්නෙමි. නමුත් මා හට අල්ලාහ්ට එරෙහිව ඔබ සඳහා යමක් කරන්නට බලයක් නැත'යි ඉබ්රාහිම් තම පියා වෙත කියූ දේ හැරය. (ඔවුන් දෙවියන් වෙත), 'අපගේ අධිපතියාණෙනි! ඔබ කෙරෙහිම අපි විශ්වාසය තබන්නෙමු. තවද අපි (පසුතැවිලි වී) ඔබ වෙතටම හැරෙන්නෙමු. තවද (අවසානයෙහි) ආපසු පැමිණීම ඔබ වෙතටම වේයැ'(යි අයැදිය).

قَدْ كَانَتْ لَكُمْ اُسْوَةٌ حَسَنَةٌ فِيْٓ اِبْرٰهِيْمَ وَالَّذِيْنَ مَعَهٗ ۚ اِذْ قَالُوْا لِقَوْمِهِمْ اِنَّا بُرَءٰٓؤُا مِنْكُمْ وَمِمَّا تَعْبُدُوْنَ مِنْ دُوْنِ اللّٰهِ ۫ كَفَرْنَا بِكُمْ وَبَدَا بَيْنَنَا وَبَيْنَكُمُ الْعَدَاوَةُ وَالْبَغْضَآءُ اَبَدًا حَتّٰى تُؤْمِنُوْا بِاللّٰهِ وَحْدَهٗٓ اِلَّا قَوْلَ اِبْرٰهِيْمَ لِاَبِيْهِ لَاَسْتَغْفِرَنَّ لَكَ وَمَآ اَمْلِكُ لَكَ مِنَ اللّٰهِ مِنْ شَيْءٍ ۭ رَبَّنَا عَلَيْكَ تَوَكَّلْنَا وَاِلَيْكَ اَنَبْنَا وَاِلَيْكَ الْمَصِيْرُ ۝٥

6. 'අපගේ අධිපතියාණෙනි! අවිශ්වාස කළවුනට අපව පිරික්සුමක් නොකරනු මැනව. අපගේ අධිපතියාණෙනි! අපට ක්ෂමාව දෙනු මැනව. නියතවශයෙන්ම බලසම්පන්නද ප්‍රඥාසම්පන්නද ඔබමය'.

رَبَّنَا لَا تَجْعَلْنَا فِتْنَةً لِّلَّذِيْنَ كَفَرُوْا وَاغْفِرْ لَنَا رَبَّنَا ۚ اِنَّكَ اَنْتَ الْعَزِيْزُ الْحَكِيْمُ ۝٦

7. අල්ලාහ් කෙරෙහිද අවසාන දිනය කෙරෙහිද අපේක්ෂා කරන අය ගත්කල නියතවශයෙන්ම ඔවුනතර නුඹලාට යහපත් ආදර්ශයක් ඇත. එමෙන්ම කවුරුන් හෝ ඉවත හැරෙන්නේද, ඇත්තෙන්ම අල්ලාහ් ස්වයංපෝෂිතය, සියල්ලෙන් ප්‍රශංසා හිමියැ(යි දැන ගනිත්වා).

لَقَدْ كَانَ لَكُمْ فِيْهِمْ اُسْوَةٌ حَسَنَةٌ لِّمَنْ كَانَ يَرْجُوا اللّٰهَ وَالْيَوْمَ الْاٰخِرَ ۭ وَمَنْ يَّتَوَلَّ فَاِنَّ اللّٰهَ هُوَ الْغَنِيُّ الْحَمِيْدُ ۝٧

8. නුඹලා අතරද (අවිශ්වාසිත) ඔවුන්ගෙන් නුඹලා සමග සතුරුවූවන්

عَسَى اللّٰهُ اَنْ يَّجْعَلَ بَيْنَكُمْ وَبَيْنَ الَّذِيْنَ

عَادَيْتُمْ مِّنْهُمْ مَّوَدَّةً ۚ وَاللَّهُ قَدِيرٌ ۚ وَاللَّهُ غَفُورٌ رَّحِيمٌ ﴿٨﴾

අතරද මිතුරුකමක් ඇති කිරීමට අල්ලාහ්ට හැකිය. තවද අල්ලාහ් බලය ඇත්තාය. තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

لَا يَنْهَاكُمُ اللَّهُ عَنِ الَّذِينَ لَمْ يُقَاتِلُوكُمْ فِي الدِّينِ وَلَمْ يُخْرِجُوكُمْ مِّن دِيَارِكُمْ أَن تَبَرُّوهُمْ وَتُقْسِطُوا إِلَيْهِمْ ۚ إِنَّ اللَّهَ يُحِبُّ الْمُقْسِطِينَ ﴿٩﴾

9. (නුඹලාගේ) ධර්මය සම්බන්ධව නුඹලාට එරෙහිව සටන් නොකළාවූ අයහටද එමෙන්ම නුඹලාව නුඹලාගේ නිවැස් වලින් පිටුවහල් නොකළාවූ අයහටද නුඹලා යහපත කර ඔවුන් සමග යුක්ති සහගතව ක්‍රියා කිරීම අල්ලාහ් නුඹලාට තහනම් නොකරන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් යුක්ති සහගතව ක්‍රියා කරන්නන්ව ප්‍රිය කරන්නේය.

إِنَّمَا يَنْهَاكُمُ اللَّهُ عَنِ الَّذِينَ قَاتَلُوكُمْ فِي الدِّينِ وَأَخْرَجُوكُم مِّن دِيَارِكُمْ وَظَاهَرُوا عَلَىٰ إِخْرَاجِكُمْ أَن تَوَلَّوْهُمْ ۚ وَمَن يَتَوَلَّهُمْ فَأُولَٰئِكَ هُمُ الظَّالِمُونَ ﴿١٠﴾

10. (නුඹලාගේ) ධර්මය සම්බන්ධව නුඹලාට එරෙහිව සටන් කළාවූද එමෙන්ම නුඹලාව නුඹලාගේ නිවැස් වලින් පිටුවහල් කළාවූද නුඹලාව පිටවහල් කිරීමට (අන් අයට) උදව් කළාවූද අය සමග මිතුරුකම් පැවැත්වීම පමණක් අල්ලාහ් නුඹලාට තහනම් කර ඇත්තේය. තවද කවුරුන්හෝ ඔවුන් සමග මිතුරුකම් පවත්වන්නේද අදමිටුවන් වන්නේ ඔවුන්මය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا إِذَا جَاءَكُمُ الْمُؤْمِنَاتُ مُهَاجِرَاتٍ فَامْتَحِنُوهُنَّ ۖ اللَّهُ أَعْلَمُ بِإِيمَانِهِنَّ ۖ فَإِنْ عَلِمْتُمُوهُنَّ مُؤْمِنَاتٍ فَلَا تَرْجِعُوهُنَّ إِلَى الْكُفَّارِ ۖ لَا هُنَّ حِلٌّ لَّهُمْ وَلَا هُمْ يَحِلُّونَ لَهُنَّ ۖ وَآتُوهُم مَّا أَنفَقُوا ۚ وَلَا جُنَاحَ عَلَيْكُمْ أَن تَنكِحُوهُنَّ إِذَا آتَيْتُمُوهُنَّ أُجُورَهُنَّ ۚ

11. එම්බල විශ්වාසිතයිනි! විශ්වාසිත ස්ත්‍රීන් සරණාගතව නුඹලා වෙත පැමිණියහොත්, ඔවුන්ව මනාව සෝදිසි කරනු. ඔවුන්ගේ විශ්වාසය ගැන අල්ලාහ් මැනැවින් දන්නේය. පසුව ඔවුන් (සැබෑ) විශ්වාසිතයින් යැයි නුඹලා දැනගත්තේ නම්, ඔවුන්ව අවිශ්වාසිතයින් වෙත ආපසු නොයවනු. (ස්ත්‍රීන් වන) මොවුන් ඔවුන්ට නිත්‍යානුකූල නොවන අතර ඔවුන්ද මොවුන්ට (ස්ත්‍රීන්ට) නිත්‍යානුකූල නොවේ. නමුත් (මොවුන්ගේ අවිශ්වාසිත පුරුෂයින් මොවුන් වෙනුවෙන්) වියදම් කළ දේ ඔවුනට දෙනු. පසුව නුඹලා මොවුනට දිය යුතු දායාදය මොවුනට දී, මොවුන්ව විවාහ කර ගැනීම නුඹලාට

وَلَا تُمْسِكُوْا بِعِصَمِ الْكَوَافِرِ وَسْـَٔلُوْا مَآ اَنْفَقْتُمْ وَلْيَسْـَٔلُوْا مَآ اَنْفَقُوْا ؕ ذٰلِكُمْ حُكْمُ اللّٰهِ ؕ يَحْكُمُ بَيْنَكُمْ ؕ وَاللّٰهُ عَلِيْمٌ حَكِيْمٌ ﴿١١﴾

වරදක් නැත. තවද අවිශ්වාසිත ස්ත්‍රීන් සමග විවාහ බන්ධනය නොපවත්වනු. නමුත් (ඔවුන් අවිශ්වාසිතයින් වෙත හැරී ගියහොත්) නුඹලා (ඔවුන් වෙනුවෙන්) වියදම් කළ දේ (ඔවුන්ගෙන් ආපසු) ඉල්ලා ගනිව්. (අවිශ්වාසිතයින් වන) ඔවුන් වියදම් කළ දේ (නුඹලාගෙන්) ඉල්ලා ගනිත්වා! මෙය අල්ලාහ්ගේ නියෝගයයි. ඔහු නුඹලා අතර විනිශ්චය කරන්නේය. තවද අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

وَاِنْ فَاتَكُمْ شَیْءٌ مِّنْ اَزْوَاجِكُمْ اِلَى الْكُفَّارِ فَعَاقَبْتُمْ فَاٰتُوا الَّذِيْنَ ذَهَبَتْ اَزْوَاجُهُمْ مِّثْلَ مَآ اَنْفَقُوْا ؕ وَاتَّقُوا اللّٰهَ الَّذِیْۤ اَنْتُمْ بِهٖ مُؤْمِنُوْنَ ﴿١٢﴾

12. තවද නුඹලාගේ භාර්යාවන්ගෙන් කවුරුන් හෝ (නුඹලාව අත්හැර) අවිශ්වාසිතයින් වෙතට පලා ගියේ නම්, නුඹලා ප්‍රති ප්‍රහාර දී (යුද්ධයේදී අවිශ්වාසිතයින්ගෙන් අත්පත් කරගත් ස්ත්‍රීන්) ඇත්තේ නම් කවුරුන්ගේ භාර්යාවන් හැරගියේද ඔවුන් (තම භාර්යයාවන්ට) කළ වියදමට සමානව ඔවුනට ලබා දෙනු. නුඹලා විශ්වාස කරන අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු.

یٰۤاَیُّهَا النَّبِیُّ اِذَا جَآءَكَ الْمُؤْمِنٰتُ یُبَایِعْنَكَ عَلٰۤى اَنْ لَّا یُشْرِكْنَ بِاللّٰهِ شَیْـًٔا وَّلَا یَسْرِقْنَ وَلَا یَزْنِیْنَ وَلَا یَقْتُلْنَ اَوْلَادَهُنَّ وَلَا یَاْتِیْنَ بِبُهْتَانٍ یَّفْتَرِیْنَهٗ بَیْنَ اَیْدِیْهِنَّ وَاَرْجُلِهِنَّ وَلَا یَعْصِیْنَكَ فِیْ مَعْرُوْفٍ فَبَایِعْهُنَّ وَاسْتَغْفِرْ لَهُنَّ اللّٰهَ ؕ اِنَّ اللّٰهَ غَفُوْرٌ رَّحِیْمٌ ﴿١٣﴾

13. එම්බල දූතයාණෙනි! විශ්වාසිත ස්ත්‍රීන් ඔබ වෙත පැමිණ තමන් අල්ලාහ්ට කිසිවක් සමාන නොතබන්නේ යැයිද තමන් සොරකම් නොකරන්නේ යැයිද දුරාචාරයෙහි නොහැසිරෙන්නේ යැයිද තම දරුවන්ව ඝාතනය නොකරන්නේ යැයිද තමන්ම දැනදැනම ගෙතූ බොරු චෝදනාවන් නොනගන්නේ යැයිද යහපත් දැයෙහි ඔබට අකීකරු නොවන්නේ යැයිද යන කරුණු මත (ඔබගේ අතෙහි) ප්‍රතිඥා දෙන්නේ නම් ඔවුන්ගේ බෙයියත් (දිවුරුම) ලබාගන්න. තවද අල්ලාහ්ගෙන් ඔවුන් වෙනුවෙන් ක්ෂමාව අයැදින්න. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

یٰۤاَیُّهَا الَّذِیْنَ اٰمَنُوْا لَا تَتَوَلَّوْا قَوْمًا

14. එම්බල විශ්වාසිතයිනි! නුඹලා අල්ලාහ්ගේ කෝපයට පාත්‍ර වූ

غَضِبَ اللّٰهُ عَلَيۡهِمۡ قَدۡ يَئِسُوۡا مِنَ الۡاٰخِرَةِ كَمَا يَئِسَ الۡكُفَّارُ مِنۡ اَصۡحٰبِ الۡقُبُوۡرِ ﴿۱۴﴾

ජනතාව මිතුරන් කර නොගනු. අවිශ්වාසිතයින් සොහොන්වල ඇති අය පිළිබඳව බලාපොරොත්තු සුන් කර ගත්තාක් මෙන් ඔවුන් (අවිශ්වාසිතයින්)ද පරලොව පිළිබඳව බලාපොරොත්තු සුන් කර ගත්හ.



අල් සෆ්
(මදිනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

سَبَّحَ لِلّٰهِ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الۡاَرۡضِ‌ۚ وَهُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ‏ ۝٢

2. අහසේහි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද අල්ලාහ්ව සුවිශුද්ධ කරති. තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

يٰۤاَيُّهَا الَّذِيۡنَ اٰمَنُوۡا لِمَ تَقُوۡلُوۡنَ مَا لَا تَفۡعَلُوۡنَ‏ ۝٣

3. එම්බල විශ්වාසිතයිනි! නුඹලා නොකරනදේ නුඹලා කියා පාන්නේ මන්ද?

كَبُرَ مَقۡتًا عِنۡدَ اللّٰهِ اَنۡ تَقُوۡلُوۡا مَا لَا تَفۡعَلُوۡنَ‏ ۝٤

4. නුඹලා නොකරනදේ නුඹලා කියා පෑම, අල්ලාහ් අභියස ඉතා පිළිකුල් දෙයකි.

اِنَّ اللّٰهَ يُحِبُّ الَّذِيۡنَ يُقَاتِلُوۡنَ فِىۡ سَبِيۡلِهٖ صَفًّا كَاَنَّهُمۡ بُنۡيَانٌ مَّرۡصُوۡصٌ‏ ۝٥

5. සැබැවින්ම, (උණු කළ) ලෝකඩයෙන් තැනූ (ශක්තිමත්) බැම්මක් සේ (පෙළ ගැසුණු) බලඇණියක් ලෙස ඔහුගේ මාර්ගයෙහි සටන් කරන අයව අල්ලාහ් ප්‍රිය කරන්නේය.

وَاِذۡ قَالَ مُوۡسٰى لِقَوۡمِهٖ يٰقَوۡمِ لِمَ تُؤۡذُوۡنَنِىۡ وَقَدْ تَّعۡلَمُوۡنَ اَنِّىۡ رَسُوۡلُ اللّٰهِ اِلَيۡكُمۡ‌ؕ فَلَمَّا زَاغُوۡۤا اَزَاغَ اللّٰهُ قُلُوۡبَهُمۡ‌ؕ وَاللّٰهُ لَا يَهۡدِى الۡقَوۡمَ الۡفٰسِقِيۡنَ‏ ۝٦

6. තවද මූසා ඔහුගේ ජනතාවට, 'එම්බල මාගේ ජනතාවනි! මා නුඹලා වෙතට (පැමිණි) අල්ලාහ්ගේ දූතයෙක් යැයි නුඹලා දැන සිටියදී නුඹලා මාහට පීඩා ඇති කරන්නේ මන්දැ?'යි කියූ අවස්ථාව (සිහිපත් කරනු). එබැවින් ඔවුන් (ඍජු මගින්) ඉවත් වූ විට, අල්ලාහ්ද ඔවුන්ගේ හදවත් ඉවත්ව යැමට සැලැස්විය. තවද අල්ලාහ් කැරළිකාර ජනතාවට මග නොපෙන්වන්නේය.

وَاِذۡ قَالَ عِيۡسَى ابۡنُ مَرۡيَمَ يٰبَنِىۡۤ

7. තවද මරියම්ගේ පුත් ඊසා, 'එම්බල ඉස්රාඊලයේ දරුවනි!

إِسْرَآءِيلَ إِنِّي رَسُولُ اللَّهِ إِلَيْكُم مُّصَدِّقًا لِّمَا بَيْنَ يَدَيَّ مِنَ التَّوْرَاةِ وَمُبَشِّرًا بِرَسُولٍ يَأْتِي مِنْ بَعْدِي اسْمُهُ أَحْمَدُ ۖ فَلَمَّا جَاءَهُم بِالْبَيِّنَاتِ قَالُوا هَٰذَا سِحْرٌ مُّبِينٌ ۝٧

නියතවශයෙන්ම මා, මාහට පෙරවූ තව්රාත්හි ඇති දේ සත්‍ය කරන්නාවූද මාගෙන් පසුව එන්නාවූ අහ්මද් නම් නාමය ඇති දූතයෙකුගේ ශුභාරංචි දෙන්නාවූද නුඹලා වෙත පැමිණි අල්ලාහ්ගේ දූතයෙක් වෙමි'යි කියූ අවස්ථාව (සිහිපත් කරනු). තවද ඔහු ඔවුන් වෙතට පැහැදිලි සාධක සමග පැමිණි කල්හි, ඔවුන්, 'මෙය පැහැදිලි මායාවකි'යි කීහ.

وَمَنْ أَظْلَمُ مِمَّنِ افْتَرَىٰ عَلَى اللَّهِ الْكَذِبَ وَهُوَ يُدْعَىٰ إِلَى الْإِسْلَامِ ۚ وَاللَّهُ لَا يَهْدِي الْقَوْمَ الظَّالِمِينَ ۝٨

8. නමුත් ඔහු ඉස්ලාම් ධර්මය වෙතට කැඳවනු ලබද්දී, අල්ලාහ්ට එරෙහිව බොරු ගොතන්නාට වඩා අදමිටු වන්නේ අන් කවරෙක් ද? අල්ලාහ් අදමිටු ජනතාවට මග නොපෙන්වන්නේය.

يُرِيدُونَ لِيُطْفِئُوا نُورَ اللَّهِ بِأَفْوَاهِهِمْ وَاللَّهُ مُتِمُّ نُورِهِ وَلَوْ كَرِهَ الْكَافِرُونَ ۝٩

9. ඔවුන් අල්ලාහ්ගේ ආලෝකය ඔවුන්ගේ මුවින් නිවා දමන්නට කැමති වන්නෝය. නමුත් අවිශ්වාසිතයින් (එය) කෙතරම් පිළිකුල් කළද, අල්ලාහ් ඔහුගේ ආලෝකය පරිපූර්ණ කරන්නේය.

هُوَ الَّذِي أَرْسَلَ رَسُولَهُ بِالْهُدَىٰ وَدِينِ الْحَقِّ لِيُظْهِرَهُ عَلَى الدِّينِ كُلِّهِ وَلَوْ كَرِهَ الْمُشْرِكُونَ ۝١٠ ع

10. මග පෙන්වීම සහ සත්‍ය ආගම සමග තම දූතයාණන්ව යැව්වේ ඔහුමය. එය සෙසු සෑම ආගමකටම වඩා අභිබවා යනු පිණිසය. (අල්ලාහ්ට) සමාන තබන්නවුන් (එය) කෙතරම් පිළිකුල් කළද,

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا هَلْ أَدُلُّكُمْ عَلَىٰ تِجَارَةٍ تُنجِيكُم مِّنْ عَذَابٍ أَلِيمٍ ۝١١

11. එම්බල විශ්වාසිතයිනි! නුඹලාව වේදනීය දඬුවමින් මුදවාගන්නාවූ වෙළඳමක් පිළිබඳව මම නුඹලාට පෙන්වා දෙන්නද?

تُؤْمِنُونَ بِاللَّهِ وَرَسُولِهِ وَتُجَاهِدُونَ فِي سَبِيلِ اللَّهِ بِأَمْوَالِكُمْ وَأَنفُسِكُمْ ۚ

12. එනම්, නුඹලා අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන් කෙරෙහි විශ්වාස කොට නුඹලාගේ වස්තූන් සහ නුඹලාගේ ජීවිත මගින් අල්ලාහ්ගේ මාර්ගයෙහි පරිශ්‍රමයෙහි යෙදෙනු.

ذَٰلِكُمْ خَيْرٌ لَّكُمْ إِن كُنتُمْ تَعْلَمُونَ ﴿١٢﴾

නුඹලා එය දැන සිටියේ නම්, එය නුඹලාට ඉතා අගනේය.

يَغْفِرْ لَكُمْ ذُنُوبَكُمْ وَيُدْخِلْكُمْ جَنَّٰتٍ تَجْرِى مِن تَحْتِهَا ٱلْأَنْهَٰرُ وَمَسَٰكِنَ طَيِّبَةً فِى جَنَّٰتِ عَدْنٍ ۚ ذَٰلِكَ ٱلْفَوْزُ ٱلْعَظِيمُ ﴿١٣﴾

13. ඔහු නුඹලාගේ පව් නුඹලාට සමා කරන්නේය. තවද ඒ තුලින් ගලා බස්නා දියදහරාවන්ගෙන් යුත් උද්‍යානයන්හිද එමෙන්ම නිත්‍ය වූ උද්‍යානයන්හි පිවිතුරු වාසස්ථානයන්හිද ඔහු නුඹලාව ඇතුළු කරවන්නේය. ඉමහත්වූ ජයග්‍රහණය එයමම වේ.

وَأُخْرَىٰ تُحِبُّونَهَا ۖ نَصْرٌ مِّنَ ٱللَّهِ وَفَتْحٌ قَرِيبٌ ۗ وَبَشِّرِ ٱلْمُؤْمِنِينَ ﴿١٤﴾

14. තවද නුඹලා ප්‍රිය කරන්නාවූ තවත් දෙයක් ඔහු (පිරිනමන්නේය). (එය) අල්ලාහ්ගෙන් උදව්වද සමීප ජයග්‍රහණයද වේ. එබැවින් විශ්වාසිතයින්ට ශුභාරංචි දෙන්න.

يَٰٓأَيُّهَا ٱلَّذِينَ ءَامَنُوا۟ كُونُوٓا۟ أَنصَارَ ٱللَّهِ كَمَا قَالَ عِيسَى ٱبْنُ مَرْيَمَ لِلْحَوَارِيِّۦنَ مَنْ أَنصَارِىٓ إِلَى ٱللَّهِ ۖ قَالَ ٱلْحَوَارِيُّونَ نَحْنُ أَنصَارُ ٱللَّهِ ۖ فَـَٔامَنَت طَّآئِفَةٌ مِّنۢ بَنِىٓ إِسْرَٰٓءِيلَ وَكَفَرَت طَّآئِفَةٌ ۖ فَأَيَّدْنَا ٱلَّذِينَ ءَامَنُوا۟ عَلَىٰ عَدُوِّهِمْ فَأَصْبَحُوا۟ ظَٰهِرِينَ ﴿١٥﴾

15. එම්බල විශ්වාසිතයිනි! අල්ලාහ්ගේ උදව්කරුවන් වනු. මරියම්ගේ පුත් ඊසා (ඔහුගේ) අනුගාමිකයින්ට, 'අල්ලාහ්ගේ මාර්ගයෙහි මාගේ උදව්කරුවන් වන්නේ කවුරුන්ද?'යි කියූ පරිදිය. අනුගාමිකයින්, 'අපි අල්ලාහ්ගේ උදව් කරුවන් වන්නෙමු'යි කීහ. එබැවින් ඉස්රාඊලයේ දරුවන්ගෙන් පිරිසක් විශ්වාස කළ අතර තවත් පිරිසක් අවිශ්වාස කළහ. එබැවින් විශ්වාස කළ අය හට ඔවුන්ගේ සතුරන්ට එරෙහිව අපි උදව් කළෙමු. තවද ඔවුන් ජයග්‍රාහිකයන් වූහ.



අල් ජුමුආහ්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يُسَبِّحُ لِلّٰهِ مَا فِى السَّمٰوٰتِ وَمَا فِى الۡاَرۡضِ الۡمَلِكِ الۡقُدُّوۡسِ الۡعَزِيۡزِ الۡحَكِيۡمِ ②

2. අහස්හි ඇති සියල්ලද පොළොවෙහි ඇති සියල්ලද අල්ලාහ්ව සුවිශුද්ධ කරන්නෝය. ස්වාධිපත්‍යය, සුවිශුද්ධය, බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

هُوَ الَّذِىۡ بَعَثَ فِى الۡاُمِّيّٖنَ رَسُوۡلًا مِّنۡهُمۡ يَتۡلُوۡا عَلَيۡهِمۡ اٰيٰتِهٖ وَيُزَكِّيۡهِمۡ وَيُعَلِّمُهُمُ الۡكِتٰبَ وَالۡحِكۡمَةَ وَاِنۡ كَانُوۡا مِنۡ قَبۡلُ لَفِىۡ ضَلٰلٍ مُّبِيۡنٍۙ ③

3. නූගත් (ජනතාව)ට ඔවුන් මීට පෙර ප්‍රත්‍යක්ෂ නොමගෙහි නිරතව සිටියදී ඔහුගේ වදන් ඔවුනට පාරායනා කරමින් ඔවුන්ව පවිත්‍ර කරමින් ඔවුනට ග්‍රන්ථයද ප්‍රඥාවද උගන්වන්නාවූ දූතයෙකුව ඔවුනතරින්ම ඔවුන් වෙතට එව්වේ ඔහුමය.

وَّاٰخَرِيۡنَ مِنۡهُمۡ لَمَّا يَلۡحَقُوۡا بِهِمۡ‌ؕ وَهُوَ الۡعَزِيۡزُ الۡحَكِيۡمُ ④

*4. තවද තවමත් ඔවුන් සමග එක්නොවූ අනෙක් අය අතරින්ද (ඔහුව එවන්නේය). තවද ඔහු බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.

ذٰلِكَ فَضۡلُ اللّٰهِ يُؤۡتِيۡهِ مَنۡ يَّشَآءُ‌ؕ وَاللّٰهُ ذُو الۡفَضۡلِ الۡعَظِيۡمِ ⑤

5. එය අල්ලාහ්ගේ වරප්‍රසාදය වේ. ඔහු අභිමත අයට ඔහු එය පිරිනමන්නේය. තවද අල්ලාහ් ඉමහත් වරප්‍රසාද හිමියාය.

مَثَلُ الَّذِيۡنَ حُمِّلُوا التَّوۡرٰىةَ ثُمَّ لَمۡ يَحۡمِلُوۡهَا كَمَثَلِ الۡحِمَارِ يَحۡمِلُ

6. තව්රාත්(හි නීතිය) වගකීම් උසුලන ලදුව පසුව එය නොඋසුලන අයගේ උපමාව පොත් පටවන ලද බූරුවෙකුගේ උපමාව බඳුය.

*සටහන. 4: මෙම වාක්‍යය විග්‍රහ කරන හදීසයේ මෙසේ සඳහන් වේ. මුහම්මද් (සල්) තුමාණන්ගේ අනුගාමිකයින් එතුමාණන්ගෙන් 'අල්ලාහ්ගේ දූතයාණෙනි මෙහි 'අනෙක් අය' යැයි සඳහන් වන අය කවුරුන් දැ'යි ඇසූහ. එයට නබි (සල්) තුමා, සල්මාන් ෆාරිස් (රලි) තුමාගේ උරහිස මත අත තබා, 'විශ්වාසය(ඊමාන්) සුරෙය්‍යා තාරකාව දක්වා ගිය විට පර්සියානු ජාතිකයෙකු වන මොහුගේ පෙළපතින් එක් කෙනෙක් හෝ බොහෝ දෙනෙක් එය නැවත ගෙන එන්නේ යැ'යි පිළිතුරු දුන්නේය. (බුහාරි).

මෙහි පොරොන්දු වූ ඉමාම් මහ්දි (අලෛ) තුමාගේ පැමිණීම පිළිබඳව පණිවිඩයද ඇත.

اَسْفَارًا ؕ بِئْسَ مَثَلُ الْقَوْمِ الَّذِيْنَ كَذَّبُوْا بِاٰيٰتِ اللّٰهِ ؕ وَاللّٰهُ لَا يَهْدِى الْقَوْمَ الظّٰلِمِيْنَ ۝٦

අල්ලාහ්ගේ සළකුණු ප්‍රතික්ෂේප කරන ජනතාවගේ උපමාව ඉතා නපුරුය. තවද අල්ලාහ් වැරදිකාර ජනතාවට මග නොපෙන්වන්නේය.

قُلْ يٰۤاَيُّهَا الَّذِيْنَ هَادُوْۤا اِنْ زَعَمْتُمْ اَنَّكُمْ اَوْلِيَآءُ لِلّٰهِ مِنْ دُوْنِ النَّاسِ فَتَمَنَّوُا الْمَوْتَ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ۝٧

7. පවසන්න, 'එම්බල යුදෙව්වනි! සෙසු (සියලුම) ජනයාට වඩා සැබැවින්ම නුඹලා අල්ලාහ්ට වඩාත් සෙනෙහවන්තයින් යැයි නුඹලා සිතන්නෙහු නම් මරණය පතනු. (ඇත්තෙන්ම) නුඹලා සත්‍යවාදීන් නම්'.

وَلَا يَتَمَنَّوْنَهٗۤ اَبَدًا بِمَا قَدَّمَتْ اَيْدِيْهِمْ ؕ وَاللّٰهُ عَلِيْمٌۢ بِالظّٰلِمِيْنَ ۝٨

8. නමුත් ඔවුන් එය කිසිවිටෙකත් නොපතන්නෝය. මන්ද ඔවුන්ගේ අත් (ඔවුන්ට පෙර) එවූ දේ හෙයිනි. තවද වැරදිකරන අයව අල්ලාහ් ඉතා මැනැවින් දන්නේය.

قُلْ اِنَّ الْمَوْتَ الَّذِىْ تَفِرُّوْنَ مِنْهُ فَاِنَّهٗ مُلٰقِيْكُمْ ثُمَّ تُرَدُّوْنَ اِلٰى عٰلِمِ الْغَيْبِ وَالشَّهَادَةِ فَيُنَبِّئُكُمْ بِمَا كُنْتُمْ تَعْمَلُوْنَ ۝٩ ع

9. පවසන්න, 'නුඹලා පලායන්නා වූ එම මරණය නියතවශයෙන්ම නුඹලාට මුණගැසෙනු ඇත. පසුව නුඹලා අදෘෂ්‍යමාන දේද දෘෂ්‍යමාන දේද දත්තා වෙත ආපසු ගෙනඑනු ලබන්නෙහුමය. තවද නුඹලා කරමින් සිටි දේ ගැන ඔහු නුඹලාට දන්වන්නේය'.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْۤا اِذَا نُوْدِىَ لِلصَّلٰوةِ مِنْ يَّوْمِ الْجُمُعَةِ فَاسْعَوْا اِلٰى ذِكْرِ اللّٰهِ وَذَرُوا الْبَيْعَ ؕ ذٰلِكُمْ خَيْرٌ لَّكُمْ اِنْ كُنْتُمْ تَعْلَمُوْنَ ۝١٠

10. එම්බල විශ්වාසිතයිනි! ජුමුආ (සිකුරාදා) නැමදුම සඳහා කැඳවනු ලබන විට අල්ලාහ්ව සිහිකිරීම වෙත යුහුසුළු වනු. තවද (සියළු) වෙළඳාම් අත්හැර දමනු. නුඹලා දැන සිටියේ නම්, එය නුඹලාට වඩාත් යහපත්ය.

فَاِذَا قُضِيَتِ الصَّلٰوةُ فَانْتَشِرُوْا فِى الْاَرْضِ وَابْتَغُوْا مِنْ فَضْلِ اللّٰهِ

11. තවද නැමදුම අවසන් කරනු ලැබූ කල්හි, භූමියෙහි විසිර යනු. තවද අල්ලාහ්ගේ වරප්‍රසාදය සොයනු. තවද නුඹලා ජයග්‍රහණය කරනු

وَاذْكُرُوا اللّٰهَ كَثِيْرًا لَّعَلَّكُمْ تُفْلِحُوْنَ ﴿١١﴾

පිණිස අල්ලාහ්ව බෙහෙවින් සිහිපත් කරනු.

وَاِذَا رَاَوْا تِجَارَةً اَوْ لَهْوًا انْفَضُّوْٓا اِلَيْهَا وَتَرَكُوْكَ قَآئِمًا ۗ قُلْ مَا عِنْدَ اللّٰهِ خَيْرٌ مِّنَ اللَّهْوِ وَمِنَ التِّجَارَةِ ۗ وَاللّٰهُ خَيْرُ الرّٰزِقِيْنَ ﴿١٢﴾

12. නමුත් ඔවුන් ඇතැම් වෙළඳාමක් හෝ විනෝදයක් හෝ දකින කල්හි, ඔවුන් ඔබ තනිව සිටිත්දී අත හැර ඒ වෙත ඇදී යන්නෝය. පවසන්න, 'විනෝදය සහ වෙළඳාමට වඩා අල්ලාහ් වෙත ඇති දේ යහපත්ය. තවද අල්ලාහ් ශ්‍රේෂ්ඨ ජීවනෝපාය සලසන්නාය'.




අල් මුනාෆිකූන්
(මදීනාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ١

2. කුහකයින් ඔබ වෙත පැමිණි කල්හි, 'ඇත්තෙන්ම ඔබ අල්ලාහ්ගේ දූතයාණන් බව අපි සාක්ෂි දරන්නෙමු'යි පවසන්නෝය. තවද ඇත්තෙන්ම අල්ලාහ් ඔබව ඔහුගේ දූතයාණන් බව දන්නේය. නමුත් නියතවශයෙන්ම කුහකයින් මුසාවාදීන් බව අල්ලාහ් සාක්ෂි දරන්නේය.

اِذَا جَآءَكَ الْمُنٰفِقُوْنَ قَالُوْا نَشْهَدُ اِنَّكَ لَرَسُوْلُ اللّٰهِ ۘ وَاللّٰهُ يَعْلَمُ اِنَّكَ لَرَسُوْلُهٗ ؕ وَاللّٰهُ يَشْهَدُ اِنَّ الْمُنٰفِقِيْنَ لَكٰذِبُوْنَ ۚ ٢

3. ඔවුන් තමන්ගේ දිවුරුම් පලිහක් ලෙස කරගෙන ඇත. මෙලෙස ඔවුන් (මිනිසුන්ව) අල්ලාහ්ගේ මාර්ගයෙන් වළක්වන්නෝය. ඔවුන් කරමින් සිටින දේ සත්තකින්ම නපුරුය.

اِتَّخَذُوْٓا اَيْمَانَهُمْ جُنَّةً فَصَدُّوْا عَنْ سَبِيْلِ اللّٰهِ ؕ اِنَّهُمْ سَآءَ مَا كَانُوْا يَعْمَلُوْنَ ٣

4. එය මක්නිසාදයත් ඔවුන් (පළමුව) විශ්වාස කර පසුව අවිශ්වාස කළ බැවිනි. එබැවින් ඔවුන්ගේ හදවත් මත මුද්‍රාව තබන ලදී. තවද (ඒ හේතුවෙන්) ඔවුන් වටහා නොගනිති.

ذٰلِكَ بِاَنَّهُمْ اٰمَنُوْا ثُمَّ كَفَرُوْا فَطُبِعَ عَلٰى قُلُوْبِهِمْ فَهُمْ لَا يَفْقَهُوْنَ ٤

5. තවද ඔබ ඔවුන්ව දකින කල්හි, ඔවුන්ගේ රූප ස්වභාවයන් ඔබව තෘප්තිමත් කරවයි. ඔවුන් කතා කළ හොත් ඔබ ඔවුන්ගේ කථාවට සවන් දෙන්නෙහිය. (ඔවුන්) හේත්තු කරන ලද වියළි ලී කොට මෙන්ය. සියලු විපැත්ති තමන් මතටම පතිත වන බව ඔවුන් සිතන්නෝය. සතුරන් වනුයේ ඔවුන්මය. එබැවින් ඔවුන්ගෙන් ප්‍රවේශම් වන්න. අල්ලාහ්ගේ ශාපය ඔවුන් මත ඇති වේවා! ඔවුන් කොහේ හරවනු ලබන්නේද!

وَاِذَا رَاَيْتَهُمْ تُعْجِبُكَ اَجْسَامُهُمْ ؕ وَاِنْ يَّقُوْلُوْا تَسْمَعْ لِقَوْلِهِمْ ؕ كَاَنَّهُمْ خُشُبٌ مُّسَنَّدَةٌ ؕ يَحْسَبُوْنَ كُلَّ صَيْحَةٍ عَلَيْهِمْ ؕ هُمُ الْعَدُوُّ فَاحْذَرْهُمْ ؕ قٰتَلَهُمُ اللّٰهُ ۫ اَنّٰى يُؤْفَكُوْنَ ٥

6. තවද ඔවුනට, 'අල්ලාහ්ගේ දූතයාණන් නුඹලා වෙනුවෙන් ක්ෂමාව අයැදීම සඳහා එනු'යි පැවසූ කල්හි, ඔවුන් ඔවුන්ගේ හිස් පැත්තකට හරවා ගන්නෝය. තවද ඔබ ඔවුන්ව උඩඟුවන්නන් ලෙස ඉවත හැරෙමින් යනු දකින්නෙහිය.

وَاِذَا قِيْلَ لَهُمْ تَعَالَوْا يَسْتَغْفِرْ لَكُمْ رَسُوْلُ اللّٰهِ لَوَّوْا رُءُوْسَهُمْ وَرَاَيْتَهُمْ يَصُدُّوْنَ وَهُمْ مُّسْتَكْبِرُوْنَ ٦

7. ඔබ ඔවුන් වෙනුවෙන් ක්ෂමාව අයැද සිටියද ඔබ ඔවුන් වෙනුවෙන් ක්ෂමාව අයැද නොසිටියද එය ඔවුනට එක හා සමානය. අල්ලාහ් ඔවුනට කිසිවිටෙකත් ක්ෂමාව නොදෙන්නේය. නියතවශයෙන්ම අල්ලාහ් කැරලිකාර ජනතාවට මග නොපෙන්වන්නේය.

سَوَآءٌ عَلَيْهِمْ اَسْتَغْفَرْتَ لَهُمْ اَمْ لَمْ تَسْتَغْفِرْ لَهُمْ ؕ لَنْ يَّغْفِرَ اللّٰهُ لَهُمْ ؕ اِنَّ اللّٰهَ لَا يَهْدِى الْقَوْمَ الْفٰسِقِيْنَ ٧

8. 'අල්ලාහ්ගේ දූතයාණන් සමඟ සිටින අය (ඔහුගෙන්) විසිරී යන තුරු නුඹලා ඔවුනට වියදම් නොකරනු'යි පවසන අය ඔවුහුය. නමුත් අල්ලාහ්ට අහස් සහ පොළොවේ වස්තූන් අයත්ය. නමුත් කුහකයෝ වටහා නොගනිති.

هُمُ الَّذِيْنَ يَقُوْلُوْنَ لَا تُنْفِقُوْا عَلٰى مَنْ عِنْدَ رَسُوْلِ اللّٰهِ حَتّٰى يَنْفَضُّوْا ؕ وَلِلّٰهِ خَزَآئِنُ السَّمٰوٰتِ وَالْاَرْضِ وَلٰكِنَّ الْمُنٰفِقِيْنَ لَا يَفْقَهُوْنَ ٨

9. ඔවුන්, 'අප මදීනාව වෙත ආපසු ගියහොත් අති ගෞරවනීය කෙනෙක් නියතවශයෙන්ම ඉතාමත් නීච කෙනෙකුව පළවා හරිනු' ඇතැයි පවසන්නෝය. නමුත් (සැබෑ) ගෞරවය හිමිවන්නේ අල්ලාහ්ටද ඔහුගේ දූතයාණන්ටද විශ්වාසිතයින්ටද වේ. නමුත් කුහකයෝ නොදනිති.

يَقُوْلُوْنَ لَئِنْ رَّجَعْنَآ اِلَى الْمَدِيْنَةِ لَيُخْرِجَنَّ الْاَعَزُّ مِنْهَا الْاَذَلَّ ؕ وَلِلّٰهِ الْعِزَّةُ وَلِرَسُوْلِهٖ وَلِلْمُؤْمِنِيْنَ وَلٰكِنَّ الْمُنٰفِقِيْنَ لَا يَعْلَمُوْنَ ٩

10. එම්බල විශ්වාසිතයිනි! නුඹලාගේ වස්තූන්ද නුඹලාගේ දූදරුවන්ද අල්ලාහ්ව සිහිකිරීමෙන් නුඹලාව ඉවතට නොහරවත්වා. තවද කවුරුන් හෝ එසේ කරන්නේද පාඩු විඳින්නන් වන්නේ ඔවුන්මය.

يٰۤاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تُلْهِكُمْ اَمْوَالُكُمْ وَلَاۤ اَوْلَادُكُمْ عَنْ ذِكْرِ اللّٰهِ ۚ وَمَنْ يَّفْعَلْ ذٰلِكَ فَاُولٰٓئِكَ هُمُ الْخٰسِرُوْنَ ١٠

11. තවද නුඹලාගෙන් කෙනෙකුට මරණය පැමිණීමට පෙර අප නුඹලාට සපයා දී ඇති දෙයින් වැය කරනු. තවද (එසේ නොකරන්නා මරණාසන්නයේ දී), 'මාගේ අධිපතියාණෙනි! ඔබ මා හට ටික කලකට පමණක් කාල අවකාශයක් ලබා දෙනු මැනව. පසුව මම දන් දී ධාර්මිෂ්ඨකයින් අතරට පත් වන්නෙමි'යි ඔහු කියනු ඇත.

وَاَنۡفِقُوۡا مِنۡ مَّا رَزَقۡنٰكُمۡ مِّنۡ قَبۡلِ اَنۡ يَّاۡتِىَ اَحَدَكُمُ الۡمَوۡتُ فَيَقُوۡلَ رَبِّ لَوۡلَاۤ اَخَّرۡتَنِىۡۤ اِلٰٓى اَجَلٍ قَرِيۡبٍۙ فَاَصَّدَّقَ وَاَكُنۡ مِّنَ الصّٰلِحِيۡنَ ﴿۱۱﴾

12. තවද කිසිම ආත්මයකට එයගේ නියමිත කාලය පැමිණි විට, අල්ලාහ් කාල අවකාශය නොදෙන්නේය. තවද නුඹලා කරන දේ ගැන අල්ලාහ් ඉතා විමසිලිමත්ය.

وَلَنۡ يُّؤَخِّرَ اللّٰهُ نَفۡسًا اِذَا جَآءَ اَجَلُهَا‌ ؕ وَاللّٰهُ خَبِيۡرٌۢ بِمَا تَعۡمَلُوۡنَ ﴿۱۲﴾




අල් තගාබුන්
(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يُسَبِّحُ لِلّٰهِ مَا فِي السَّمٰوٰتِ وَمَا فِي الْاَرْضِ ۚ لَهُ الْمُلْكُ وَلَهُ الْحَمْدُ ۖ وَهُوَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ②

2. අහස්හි ඇති සියළු දේද පොළොවෙහි ඇති සියළු දේද අල්ලාහ්ව සුවිශුද්ධ කරති. රාජධානිය ඔහුට අයත්ය. ප්‍රශංසාවද ඔහුට අයත්ය. තවද ඔහු සියළු දේ කෙරෙහි බලය ඇත්තාය.

هُوَ الَّذِيْ خَلَقَكُمْ فَمِنْكُمْ كَافِرٌ وَّمِنْكُمْ مُّؤْمِنٌ ۗ وَاللّٰهُ بِمَا تَعْمَلُوْنَ بَصِيْرٌ ③

3. නුඹලාව මවා ඇත්තේ ඔහුමය. පසුව නුඹලාගෙන් සමහරු අවිශ්වාසිතයන් වෙති. තවද නුඹලාගෙන් සමහරුන් විශ්වාසිතයින් වෙති. තවද නුඹලා කරන දේ අල්ලාහ් දකින්නේය.

خَلَقَ السَّمٰوٰتِ وَالْاَرْضَ بِالْحَقِّ وَصَوَّرَكُمْ فَاَحْسَنَ صُوَرَكُمْ ۚ وَاِلَيْهِ الْمَصِيْرُ ④

4. ඔහු අහස් සහ පොළොව සත්‍යය සමග මැව්වේය. තවද ඔහු නුඹලාව හැඩගැස්විය. පසුව නුඹලාගේ හැඩරුව අතිවිශිෂ්ඨ කළේය. තවද (අවසානයේදී) ඔහු වෙතටම ආපසු පමුණුවනු ලබන්නේය.

يَعْلَمُ مَا فِي السَّمٰوٰتِ وَالْاَرْضِ وَيَعْلَمُ مَا تُسِرُّوْنَ وَمَا تُعْلِنُوْنَ ۗ وَاللّٰهُ عَلِيْمٌ بِذَاتِ الصُّدُوْرِ ⑤

5. ඔහු අහස් සහ පොළොවෙහි ඇති සියළු දේ දන්නේය. තවද ඔහු නුඹලා සඟවන දේද නුඹලා හෙළිකරන දේද දන්නේය. තවද අල්ලාහ් සිත්හි ඇති දේ ඉතා මැනැවින් දන්නේය.

اَلَمْ يَاْتِكُمْ نَبَؤُا الَّذِيْنَ كَفَرُوْا مِنْ قَبْلُ ۖ فَذَاقُوْا وَبَالَ اَمْرِهِمْ وَلَهُمْ عَذَابٌ اَلِيْمٌ ⑥

6. මෙයට පෙර අවිශ්වාස කළවුන්ගේ ආරංචි නුඹලාට නොලැබුණේද? තවද ඔවුන්, ඔවුන්ගේ කල් ක්‍රියාවෙහි නපුරු ප්‍රතිවිපාකයන් අත් වින්දහ. තවද ඔවුනට වේදනීය දඬුවමක් (නියම වී) ඇත.

7. ඒ මන්දයත්, ඔවුන්ගේ දූතයින් ඔවුන් වෙතට ප්‍රත්‍යක්ෂ සළකුණු සමග පැමිණි හෙයිනි. නමුත් ඔවුන්, 'අපට මග පෙන්වන්නේ මනුෂ්‍යයෙක්දැ?'යි කීහ. එබැවින් ඔවුන් අවිශ්වාස කළහ. තවද පිටු පෑහ. නමුත් අල්ලාහ් (ඔවුන්ව) නොසලකා හැරියේය. තවද අල්ලාහ් ස්වයංපෝෂිතය. සියල්ලෙන් ප්‍රශංසා හිමිය.

ذَٰلِكَ بِأَنَّهُۥ كَانَت تَّأْتِيهِمْ رُسُلُهُم بِٱلْبَيِّنَٰتِ فَقَالُوٓا۟ أَبَشَرٌ يَهْدُونَنَا فَكَفَرُوا۟ وَتَوَلَّوا۟ ۚ وَّٱسْتَغْنَى ٱللَّهُ ۚ وَٱللَّهُ غَنِىٌّ حَمِيدٌ ٧

8. අවිශ්වාස කළ අය තමන් කිසිවිටෙකත් නැගිටවනු ලබන්නේ නැතැයි දැඩි අධිෂ්ඨානයෙන් සිටිති. පවසන්න, 'නොඑසේය, මාගේ අධිපතියාණන් සාක්කි! නුඹලා නියත වශයෙන්ම නැගිටවනු ලබන්නෙහුය. පසුව නුඹලා කළ දේ ගැන නියත වශයෙන්ම නුඹලාට දන්වනු ලබන්නේය. තවද මෙය අල්ලාහ්ට පහසු දෙයකි'.

زَعَمَ ٱلَّذِينَ كَفَرُوٓا۟ أَن لَّن يُبْعَثُوا۟ ۚ قُلْ بَلَىٰ وَرَبِّى لَتُبْعَثُنَّ ثُمَّ لَتُنَبَّؤُنَّ بِمَا عَمِلْتُمْ ۚ وَذَٰلِكَ عَلَى ٱللَّهِ يَسِيرٌ ٨

9. එබැවින් අල්ලාහ් කෙරෙහිද ඔහුගේ දූතයාණන් කෙරෙහිද අප පහළ කර ඇති ආලෝකය කෙරෙහිද විශ්වාස කරනු. තවද අල්ලාහ් නුඹලා කරන දේ ගැන ඉතා විමසිලිමත්ය.

فَـَٔامِنُوا۟ بِٱللَّهِ وَرَسُولِهِۦ وَٱلنُّورِ ٱلَّذِىٓ أَنزَلْنَا ۚ وَٱللَّهُ بِمَا تَعْمَلُونَ خَبِيرٌ ٩

10. ඒකරාශි කරන්නාවූ දිනය සඳහා ඔහු නුඹලාව එක්රැස් කරන එදිනෙහිදී එය අන්‍යෝන්‍ය (ලාභාලාභ) (තීරණය කරන) දිනය වනු ඇත. තවද කවුරුන් හෝ අල්ලාහ් කෙරෙහි විශ්වාස කරමින් යහපත් ක්‍රියා කරන්නේද ඔවුන්ගේ ක්‍රියාවන්හි නපුරු (ප්‍රතිවිපාකයන්) ඔහු ඔවුන්ගෙන් ඉවත් කරන්නේය. තවද ඔවුන්ව උද්‍යානයන්හි ඇතුළුවීමට සලස්වන්නේය. ඒතුලින් දියදහරාවන් ගලා බසිනු ඇත. ඔවුන් එහි සදාකල් වෙසෙන්නන්ය. එය අති මහත් වූ ජයග්‍රහණයකි.

يَوْمَ يَجْمَعُكُمْ لِيَوْمِ ٱلْجَمْعِ ۖ ذَٰلِكَ يَوْمُ ٱلتَّغَابُنِ ۗ وَمَن يُؤْمِنۢ بِٱللَّهِ وَيَعْمَلْ صَٰلِحًا يُكَفِّرْ عَنْهُ سَيِّـَٔاتِهِۦ وَيُدْخِلْهُ جَنَّٰتٍ تَجْرِى مِن تَحْتِهَا ٱلْأَنْهَٰرُ خَٰلِدِينَ فِيهَآ أَبَدًا ۚ ذَٰلِكَ ٱلْفَوْزُ ٱلْعَظِيمُ ١٠

11. නමුත් අවිශ්වාස කොට අපගේ සළකුණු බොරුයැයි සැළකූ අය ගත්කල, නිරා ගින්නේ සහකරුවන්

وَٱلَّذِينَ كَفَرُوا۟ وَكَذَّبُوا۟ بِـَٔايَٰتِنَآ أُو۟لَٰٓئِكَ أَصْحَٰبُ ٱلنَّارِ خَٰلِدِينَ فِيهَا ۖ

وَبِئْسَ الْمَصِيرُ ﴿١١﴾

වන්නේ මොවුන්මය. එහි මොවුන් දිගුකල් වෙසෙන්නෝය. තවද එය නපුරු නවාතැනකි!

مَآ اَصَابَ مِنْ مُّصِيبَةٍ اِلَّا بِاِذْنِ اللّٰهِ ۗ وَمَنْ يُّؤْمِنْ بِاللّٰهِ يَهْدِ قَلْبَهٗ ۗ وَاللّٰهُ بِكُلِّ شَيْءٍ عَلِيمٌ ﴿١٢﴾

12. අල්ලාහ්ගේ අවසරයෙන් තොරව කිසිදු විපතක් අත් නොවන්නේය. තවද කවුරුන් හෝ අල්ලාහ් කෙරෙහි විශ්වාස කරන්නේද ඔහුගේ හදවතට ඔහු (ඍජු)මග පෙන්වන්නේය. තවද අල්ලාහ් සියලු දේ ගැන ඉතා මැනැවින් දන්නේය.

وَاَطِيعُوا اللّٰهَ وَاَطِيعُوا الرَّسُولَ ۚ فَاِنْ تَوَلَّيْتُمْ فَاِنَّمَا عَلٰى رَسُولِنَا الْبَلٰغُ الْمُبِينُ ﴿١٣﴾

13. තවද අල්ලාහ්ට අවනත වනු. එමෙන්ම දූතයාණන්ටද අවනත වනු. නමුත් නුඹලා පිටුපෑවේ නම්, අපගේ දූතයාණන් කෙරෙහි වගකීම වන්නේ (පණිවිඩය) පැහැදිලිව දන්වා සිටීම පමණි.

اَللّٰهُ لَآ اِلٰهَ اِلَّا هُوَ ۗ وَعَلَى اللّٰهِ فَلْيَتَوَكَّلِ الْمُؤْمِنُونَ ﴿١٤﴾

14. අල්ලාහ්! ඔහු හැර නැමදීමට සුදුස්සා අන්කිසිවෙක් නොමැත. එබැවින් විශ්වාසිතයින් අල්ලාහ් කෙරෙහි පමණක් තමන්ගේ විශ්වාසය තැබිය යුතුය.

يٰٓاَيُّهَا الَّذِينَ اٰمَنُوٓا اِنَّ مِنْ اَزْوَاجِكُمْ وَاَوْلَادِكُمْ عَدُوًّا لَّكُمْ فَاحْذَرُوهُمْ ۚ وَاِنْ تَعْفُوا وَتَصْفَحُوا وَتَغْفِرُوا فَاِنَّ اللّٰهَ غَفُورٌ رَّحِيمٌ ﴿١٥﴾

15. එම්බල විශ්වාසිතයිනි! නියතවශයෙන්ම නුඹලාගේ භාර්යයාවන් සහ නුඹලාගේ දරුවන්ගෙන් (සමහරුන් සැබැවින්ම) නුඹලාගේ සතුරන් වෙති. එබැවින් ඔවුන්ගෙන් ප්‍රවේසම් වනු. තවද නුඹලා සැළකිල්ලට නොගෙන ඉවසමින් සමාව දෙන්නේ නම් නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

اِنَّمَآ اَمْوَالُكُمْ وَاَوْلَادُكُمْ فِتْنَةٌ ۗ وَاللّٰهُ عِنْدَهٗٓ اَجْرٌ عَظِيمٌ ﴿١٦﴾

16. සැබැවින්ම නුඹලාගේ වස්තූන්ද නුඹලාගේ දූදරුවන්ද පිරික්සුමක් වේ. නමුත් අති මහත් වූ තිළිණය ඇත්තේ අල්ලාහ් වෙතමය.

فَاتَّقُوا اللّٰهَ مَا اسْتَطَعْتُمْ وَاسْمَعُوا وَاَطِيعُوا وَاَنْفِقُوا خَيْرًا لِّاَنْفُسِكُمْ ۗ

17. එබැවින් නුඹලා හැකි පමණින් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. තවද සවන් දෙනු. තවද අවනත වනු.

وَمَنْ يُّوْقَ شُحَّ نَفْسِهٖ فَاُولٰٓئِكَ هُمُ الْمُفْلِحُوْنَ ﴿١٧﴾

තවද (ඔහුගේ මාර්ගයෙහි) වැය කරනු. එය නුඹලාටම යහපතක් වනු ඇත. තවද කවුරුන් හෝ මසුරු කමින් මිදුනේද ජයග්‍රාහිකයන් වන්නේ එවැන්නන්මය.

اِنْ تُقْرِضُوا اللّٰهَ قَرْضًا حَسَنًا يُّضٰعِفْهُ لَكُمْ وَيَغْفِرْ لَكُمْ ؕ وَاللّٰهُ شَكُوْرٌ حَلِيْمٌ ۙ﴿١٨﴾

18. නුඹලා අල්ලාහ්ට යහපත් ණයක් ලබා දෙන්නේ නම් ඔහු ඒ වෙනුවෙන් නුඹලාට එය ප්‍රගුණ කර දෙන අතර නුඹලාට සමාවද දෙන්නේය. තවද අල්ලාහ් ඉතා අගය කරන්නාය, ඉවසිලිවන්තය.

عٰلِمُ الْغَيْبِ وَالشَّهَادَةِ الْعَزِيْزُ الْحَكِيْمُ ﴿١٩﴾

19. අදෘෂ්‍යමානයද දෘෂ්‍යමානයද දන්නාය. බලසම්පන්නය, ප්‍රඥාසම්පන්නය.



## අල් තලාක්
(මදීනාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰٓاَيُّهَا النَّبِيُّ اِذَا طَلَّقْتُمُ النِّسَآءَ فَطَلِّقُوْهُنَّ لِعِدَّتِهِنَّ وَاَحْصُوا الْعِدَّةَ ۚ وَاتَّقُوا اللّٰهَ رَبَّكُمْ ۚ لَا تُخْرِجُوْهُنَّ مِنْۢ بُيُوْتِهِنَّ وَلَا يَخْرُجْنَ اِلَّآ اَنْ يَّاْتِيْنَ بِفَاحِشَةٍ مُّبَيِّنَةٍ ۗ وَتِلْكَ حُدُوْدُ اللّٰهِ ۗ وَمَنْ يَّتَعَدَّ حُدُوْدَ اللّٰهِ فَقَدْ ظَلَمَ نَفْسَهٗ ۗ لَا تَدْرِيْ لَعَلَّ اللّٰهَ يُحْدِثُ بَعْدَ ذٰلِكَ اَمْرًا ۝٢

2. එම්බල වක්තෘවරයාණෙනි! නුඹලා ස්ත්‍රීන්ව දික්කසාද කරන විට ඔවුන්ව (නියමිත) වාරයකට අනුව දික්කසාද කරනු. තවද වාරය ගණන් තබා ගනු. තවද නුඹලාගේ අධිපතියාණන් වන අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වනු. ඔවුන් ප්‍රකට දුරාචාරයක යෙදුණහොත් මිස නුඹලා ඔවුන්ගේ නිවැස්වලින් ඔවුන්ව පිටුවහල් නොකරනු. ඔවුන්ද පිටවී නොයා යුතුය. තවද මේවා අල්ලාහ්ගේ (නියම කළාවූ) සීමාවන් වේ. තවද කවුරුන් හෝ අල්ලාහ්ගේ සීමාවන් කඩ කරන්නේද ඇත්තෙන්ම ඔහු තම ආත්මයට වැරදි කරගන්නේය. මෙයට පසුව අල්ලාහ්ට අලුත් දෙයක් ඇති කරන්නට පුළුවන් බව ඔබ නොදන්නෙහිය.

فَاِذَا بَلَغْنَ اَجَلَهُنَّ فَاَمْسِكُوْهُنَّ بِمَعْرُوْفٍ اَوْ فَارِقُوْهُنَّ بِمَعْرُوْفٍ وَّاَشْهِدُوْا ذَوَيْ عَدْلٍ مِّنْكُمْ وَاَقِيْمُوا الشَّهَادَةَ لِلّٰهِ ۗ ذٰلِكُمْ يُوْعَظُ بِهٖ مَنْ كَانَ يُؤْمِنُ بِاللّٰهِ وَالْيَوْمِ الْاٰخِرِ ۬ۙ وَمَنْ يَّتَّقِ اللّٰهَ يَجْعَلْ لَّهٗ مَخْرَجًا ۝٣

3. පසුව ඔවුන් තමන්ගේ (නියමිත) වාරයේ අවසානයට ලඟා වූ කල්හි ඔවුන්ව යහපත් අයුරින් රඳවා තබනු. නැතහොත් ඔවුන්ව යහපත් අයුරින් පිටත් කර හරිනු. තවද නුඹලා අතුරින් යුක්තිගරුක දෙදෙනෙකුව සාක්ෂි දීමට කැඳවා ගනු. තවද අල්ලාහ් වෙනුවෙන් (සත්‍ය) සාක්ෂි දරනු. මෙය අල්ලාහ් සහ අවසන් දිනය කෙරෙහි විශ්වාස කරන්නෙකුට අනුශාසනා කරන ලද්දකි. තවද යමෙක් අල්ලාහ් කෙරෙහි බියබැතිමත් වන්නේද ඔහු සඳහා නිසි මගක් ඔහු පාදා දෙන්නේය.

وَّيَرْزُقْهُ مِنْ حَيْثُ لَا يَحْتَسِبُ ۗ وَمَنْ

4. තවද ඔහු බලාපොරොත්තු නොවූ අයුරින් ඔහු ඔහුට ජීවනෝපාය ලබා

يَتَوَكَّلْ عَلَى اللّٰهِ فَهُوَ حَسْبُهٗ ؕ اِنَّ اللّٰهَ بَالِغُ اَمْرِهٖ ؕ قَدْ جَعَلَ اللّٰهُ لِكُلِّ شَیْءٍ قَدْرًا ﴿٤﴾

දෙන්නේය. තවද කවුරුන් හෝ තම විශ්වාසය අල්ලාහ් කෙරෙහි තබන්නේද ඔහුට ඔහු ප්‍රමාණවත්ය. ඇත්තෙන්ම අල්ලාහ් තම අරමුණ ඉටු කරන්නේමය. සියලු දේවල් සඳහා අල්ලාහ් ප්‍රමාණයක් නියම කර ඇත්තේය.

وَالّٰٓـِٔىْ يَئِسْنَ مِنَ الْمَحِيْضِ مِنْ نِّسَآئِكُمْ اِنِ ارْتَبْتُمْ فَعِدَّتُهُنَّ ثَلٰثَةُ اَشْهُرٍ ۙ وَّالّٰٓـِٔىْ لَمْ يَحِضْنَ ؕ وَاُولَاتُ الْاَحْمَالِ اَجَلُهُنَّ اَنْ يَّضَعْنَ حَمْلَهُنَّ ؕ وَمَنْ يَّتَّقِ اللّٰهَ يَجْعَلْ لَّهٗ مِنْ اَمْرِهٖ يُسْرًا ﴿٥﴾

5. තවද නුඹලාගේ ස්ත්‍රීන්ගෙන් මාසික ඔසප්වාරයෙන් බලාපොරොත්තු සුන් කරගත් අය ගත්කල ඔවුන් ගැන නුඹලා සැකයෙහි නම්, එවිට ඔවුන් සඳහා නියමිත රැඳුම් වාරය තුන් මසක්ය. තමන්ගේ මාසික ඔසප්වාරයන් නොමැති අය සඳහාද (එලෙසමය). තවද දරුගැබ් ගත් අය ගත්කල ඔවුන්ගේ රැඳුම්වාරය වන්නේ ඔවුන්ගේ දරුගැබ ඔවුන් ප්‍රසූත කරන තෙක්ය. තවද කවුරුන් හෝ අල්ලාහ්ට බියබැතිමත් වන්නේද ඔහුගේ කටයුතුවලදී ඔහුට පහසුකම් ඔහු සලසා දෙන්නේය.

ذٰلِكَ اَمْرُ اللّٰهِ اَنْزَلَهٗۤ اِلَيْكُمْ ؕ وَمَنْ يَّتَّقِ اللّٰهَ يُكَفِّرْ عَنْهُ سَيِّاٰتِهٖ وَيُعْظِمْ لَهٗۤ اَجْرًا ﴿٦﴾

6. එය අල්ලාහ්ගේ නියෝගය වේ. ඔහු එය නුඹලා වෙත පහළ කර ඇත්තේය. තවද කවුරුන් හෝ අල්ලාහ්ට බියබැතිමත් වන්නේද ඔහුගේ ක්‍රියාවන්හි නපුරු (ප්‍රතිවිපාකයන්) පහකොට, ඔහුගේ තිළිණය ඔහු ප්‍රගුණ කරන්නේය.

اَسْكِنُوْهُنَّ مِنْ حَيْثُ سَكَنْتُمْ مِّنْ وُّجْدِكُمْ وَلَا تُضَآرُّوْهُنَّ لِتُضَيِّقُوْا عَلَيْهِنَّ ؕ وَاِنْ كُنَّ اُولَاتِ حَمْلٍ فَاَنْفِقُوْا عَلَيْهِنَّ حَتّٰى يَضَعْنَ حَمْلَهُنَّ ۚ فَاِنْ اَرْضَعْنَ لَكُمْ فَاٰتُوْهُنَّ اُجُوْرَهُنَّ ۚ وَاْتَمِرُوْا بَيْنَكُمْ بِمَعْرُوْفٍ ۚ وَاِنْ

7. (ඔවුන්ගේ නියමිත වාරය අතරතුරදී) නුඹලාගේ වත්කමට (අනුව) නුඹලා වෙසෙන නිවැස්හි ඔවුනට නවාතැන් දෙනු. තවද නුඹලා ඔවුනට පීඩාවක් ඇති කරනු පිණිස ඔවුනට හිරිහැර නොකරනු. තවද ඔවුන් දරුගැබ් ගෙන සිටින්නේ නම් ඔවුන්ගේ දරුගැබ ඔවුන් ප්‍රසූත කරන තෙක් ඔවුනට වැය කරනු. තවද ඔවුන් නුඹලා වෙනුවෙන් (දරුවාට) කිරි පොවන්නේ නම් ඔවුන්ගේ පාරිතෝෂිකය ඔවුනට ගෙවා දමනු. තවද නුඹලා අන්‍යෝන්‍ය සාකච්ඡා මගින් නුඹලාගේ කටයුතු

تَعَاسَرْتُمْ فَسَتُرْضِعُ لَهُۥٓ أُخْرَىٰ ٧

යහපත් අයුරින් තීරණය කරගනු. නමුත් නුඹලා එකිනෙකා අතර එකඟ වීමට අපහසු වන්නේ නම් පසුව ඔහු (පියා) වෙනුවෙන් (දරුවාට) වෙනත් (කිරිමවක්) කිරි පොවත්වා.

لِيُنفِقْ ذُو سَعَةٍ مِّن سَعَتِهِۦ ۖ وَمَن قُدِرَ عَلَيْهِ رِزْقُهُۥ فَلْيُنفِقْ مِمَّآ ءَاتَىٰهُ ٱللَّهُ ۚ لَا يُكَلِّفُ ٱللَّهُ نَفْسًا إِلَّا مَآ ءَاتَىٰهَا ۚ سَيَجْعَلُ ٱللَّهُ بَعْدَ عُسْرٍ يُسْرًا ٨

8. වත්කම බහුලව ඇති අය තම වත්කම අනුව වැය කළ යුතුය. තවද, යමෙකුට වත්කම අඩුවෙන් දෙන ලද්දේද අල්ලාහ් ඔහුට දුන් දේ අනුව ඔහු වැය කළ යුතුය. අල්ලාහ් කිසිදු ආත්මයට ඔහු එයට දී ඇති හැකියාවට වඩා වැඩියෙන් නොපටවන්නේය. අල්ලාහ් ඉතා ඉක්මනින් දුෂ්කරතාවයට පසු පහසුවක් ඇති කරන්නේය.

وَكَأَيِّن مِّن قَرْيَةٍ عَتَتْ عَنْ أَمْرِ رَبِّهَا وَرُسُلِهِۦ فَحَاسَبْنَٰهَا حِسَابًا شَدِيدًا وَعَذَّبْنَٰهَا عَذَابًا نُّكْرًا ٩

9. තවද, කොපමණ ජනාවාසයන් තම අධිපතියාණන්ගේ අණටත් ඔහුගේ දූතයින්ටත් එරෙහිව කළහකාරී වූයේද! තවද, අපි ඒවා දැඩි ගණන් විමසීමකට ලක් කර දරුණු දඬුවමකින් අපි ඒවාට දඬුවම් දුන්නෙමු.

فَذَاقَتْ وَبَالَ أَمْرِهَا وَكَانَ عَٰقِبَةُ أَمْرِهَا خُسْرًا ١٠

10. එබැවින් ඒවා තම ක්‍රියාවන්හි නපුරු ප්‍රතිවිපාකයන් අත් වින්දහ. තවද, ඒවායේ ක්‍රියාවන්හි අවසානය විනාශයම විය.

أَعَدَّ ٱللَّهُ لَهُمْ عَذَابًا شَدِيدًا ۖ فَٱتَّقُوا۟ ٱللَّهَ يَٰٓأُو۟لِى ٱلْأَلْبَٰبِ ٱلَّذِينَ ءَامَنُوا۟ ۚ قَدْ أَنزَلَ ٱللَّهُ إِلَيْكُمْ ذِكْرًا ١١

11. අල්ලාහ් ඔවුනට දැඩි දඬුවමක් පිළියෙල කර ඇත්තේය. එබැවින් අල්ලාහ්ට බියබැතිමත් වනු. විශ්වාස කළ වටහාගන්නා මිනිසුනි! ඇත්තෙන්ම අල්ලාහ් නුඹලා වෙත සිහිකිරීමක් පහළ කර ඇත්තේය.

رَّسُولًا يَتْلُوا۟ عَلَيْكُمْ ءَايَٰتِ ٱللَّهِ مُبَيِّنَٰتٍ لِّيُخْرِجَ ٱلَّذِينَ ءَامَنُوا۟ وَعَمِلُوا۟ ٱلصَّٰلِحَٰتِ مِنَ ٱلظُّلُمَٰتِ إِلَى ٱلنُّورِ ۚ وَمَن يُؤْمِنۢ

12. එනම් අල්ලාහ්ගේ පැහැදිලි සළකුණු නුඹලාට කියා පෙන්වන්නාවූ දූතයෙක්ව (පහළ කළේය). එය ඔහු විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන අයව (සියළු ආකාරයේ) අන්ධකාරයන්ගෙන් ආලෝකය වෙතට

بِاللّٰهِ وَيَعْمَلْ صَالِحًا يُّدْخِلْهُ جَنّٰتٍ تَجْرِيْ مِنْ تَحْتِهَا الْاَنْهٰرُ خٰلِدِيْنَ فِيْهَآ اَبَدًا ؕ قَدْ اَحْسَنَ اللّٰهُ لَهٗ رِزْقًا ﴿١٢﴾

ගෙන එනු පිණිසය. තවද කවුරුන්හෝ අල්ලාහ් කෙරෙහි විශ්වාස කර යහපත් ක්‍රියාවන් කරන්නේද ඔහුව උද්‍යානයන්හි ඇතුළුවීමට ඔහු සලස්වන්නේය. ඒවාට පහළින් ගංගාවන් ගලා බසිනු ඇත. එහි ඔවුන් සදාකල් වෙසෙන්නන්ය. ඇත්තෙන්ම අල්ලාහ් ඔවුනට අති විශිෂ්ඨ වූ ජීවනෝපායක් සලසා ඇත්තේය.

اَللّٰهُ الَّذِيْ خَلَقَ سَبْعَ سَمٰوٰتٍ وَّمِنَ الْاَرْضِ مِثْلَهُنَّ ؕ يَتَنَزَّلُ الْاَمْرُ بَيْنَهُنَّ لِتَعْلَمُوْٓا اَنَّ اللّٰهَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ ۙ وَّاَنَّ اللّٰهَ قَدْ اَحَاطَ بِكُلِّ شَيْءٍ عِلْمًا ﴿١٣﴾

13. අහස් සතද ඒවා මෙන් පොළොවද මවා ඇත්තේ අල්ලාහ්ය. අල්ලාහ්ට සියල්ල කෙරෙහි බලය ඇති බවත් අල්ලාහ් (තම) දැනුමෙන් සියළු දේ වෙළාගන්නා බවත් නුඹලා දැනගනු පිණිස (දේව) නියෝගය ඒවා අතරින් පහළ වන්නේය.



## අල් තහ්රීම්
(මදීනාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يٰۤاَيُّهَا النَّبِىُّ لِمَ تُحَرِّمُ مَاۤ اَحَلَّ اللّٰهُ لَكَ‌ۚ تَبۡتَغِىۡ مَرۡضَاتَ اَزۡوَاجِكَ‌ؕ وَاللّٰهُ غَفُوۡرٌ رَّحِيۡمٌ‏ ۝٢

2. එම්බල වක්තෘවරයාණෙනි! ඔබ ඔබගේ භාර්යයාවන්ගේ සොම්නස පතමින් අල්ලාහ් ඔබට නිත්‍යානුකූල කර ඇති දේ (ඔබටම) තහනම් කර ගන්නේ මන්ද? තවද අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.

قَدۡ فَرَضَ اللّٰهُ لَـكُمۡ تَحِلَّةَ اَيۡمَانِكُمۡ‌ۚ وَاللّٰهُ مَوۡلٰٮكُمۡ‌ۚ وَهُوَ الۡعَلِيۡمُ الۡحَكِيۡمُ‏ ۝٣

3. ඇත්තෙන්ම අල්ලාහ් (පෙර සඳහන් වූ දේ සම්බන්ධව) නුඹලාගේ ප්‍රතිඥාවන් අවලංගු කිරීමට නුඹලාට අවසර දී ඇත්තේය. තවද අල්ලාහ් නුඹලාගේ ආරක්ෂකයාය. තවද ඔහු සියල්ල දත්තාය, ප්‍රඥාසම්පන්නය.

وَاِذۡ اَسَرَّ النَّبِىُّ اِلٰى بَعۡضِ اَزۡوَاجِهٖ حَدِيۡثًا‌ۚ فَلَمَّا نَبَّاَتۡ بِهٖ وَاَظۡهَرَهُ اللّٰهُ عَلَيۡهِ عَرَّفَ بَعۡضَهٗ وَاَعۡرَضَ عَنۡۢ بَعۡضٍ‌ۚ فَلَمَّا نَبَّاَهَا بِهٖ قَالَتۡ مَنۡ اَنۡۢبَاَكَ هٰذَا‌ؕ قَالَ نَبَّاَنِىَ الۡعَلِيۡمُ الۡخَبِيۡرُ‏ ۝٤

4. තවද වක්තෘවරයාණන් ඔහුගේ භාර්යයාවන්ගෙන් කෙනෙකුට රහසින් පැවසූ කරුණ, පසුව ඇය එම දේ හෙළිදරව් කළ කල්හි අල්ලාහ් ඔහුට ඒ ගැන දැනුම් දුන්නේය. ඔහු එයින් කොටසක් (ඇයට) දැන්වූ අතර කොටසක් (දැන්වීමෙන්) මගහරවා ගත්තේය. තවද ඔහු එය ගැන ඇයට දැනුම් දුන් කල්හි, ඇය, 'ඒ ගැන ඔබට දැනුම් දී ඇත්තේ කවරෙක්දැ?'යි විමසුවාය. ඔහු, 'සියල්ල දත්තාවූද, සියල්ල විමසිලිමත් වූද (අල්ලාහ්) මා හට දැනුම් දී ඇත්තේයැ'යි පැවසුවේය.

اِنۡ تَتُوۡبَاۤ اِلَى اللّٰهِ فَقَدۡ صَغَتۡ قُلُوۡبُكُمَا‌ۚ وَاِنۡ تَظٰهَرَا عَلَيۡهِ فَاِنَّ اللّٰهَ هُوَ مَوۡلٰٮهُ وَجِبۡرِيۡلُ وَصَالِحُ الۡمُؤۡمِنِيۡنَ‌ۚ وَالۡمَلٰٓـئِكَةُ

5. (දැන් භාර්යයාවන් වන) නුඹලා දෙදෙනා අල්ලාහ් වෙතට පසුතැවිලිව හැරෙන්නේ නම් (එය නුඹලාට වඩා යහපත් වනු ඇත). එමෙන්ම නුඹලාගේ හදවත් (දැනටමත් එය සඳහා) නැඹුරු වී ඇත. නමුත් නුඹලා දෙදෙනා ඔහුට එරෙහිව එකිනෙකාට අනුබල දෙන්නේ නම්,

بَعْدَ ذَٰلِكَ ظَهِيرٌ ٥

නියතවශයෙන්ම අල්ලාහ් ඔහුගේ උදව්කරුවාය. එමෙන්ම ජිබ්රීල්ද විශ්වාසීතයින් අතරින් ධාර්මිෂ්ඨකයින්ද, එපමණක්ද නොව අනෙක් සුරදූතයින්ද (ඔහුගේ) උදව්කරුවන්ය.

عَسَىٰ رَبُّهُ إِنْ طَلَّقَكُنَّ أَنْ يُبْدِلَهُ أَزْوَاجًا خَيْرًا مِنْكُنَّ مُسْلِمَاتٍ مُؤْمِنَاتٍ قَانِتَاتٍ تَائِبَاتٍ عَابِدَاتٍ سَائِحَاتٍ ثَيِّبَاتٍ وَأَبْكَارًا ٦

6. ඔහු නුඹලාව දික්කසාද කළහොත් ඔහුගේ අධිපතියාණන් නුඹලා වෙනුවට නුඹලාට වඩා යටහත් පහත්වූද, විශ්වාසීතවූද, අවනතවූද, නිරතුරුවම දෙවියන් වෙතට හැරෙන්නාවූද, නැමදුමෙහි භක්තිමත්වූද, උපවාසය රකින්නාවූද, වැන්දඹු හා කන්‍යාවන් (දෙපිරිස)ද භාර්‍යයාවන් ලෙස ඔහුට ලබා දෙන්නට පුළුවන.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا قُوا أَنْفُسَكُمْ وَأَهْلِيكُمْ نَارًا وَقُودُهَا النَّاسُ وَالْحِجَارَةُ عَلَيْهَا مَلَائِكَةٌ غِلَاظٌ شِدَادٌ لَا يَعْصُونَ اللَّهَ مَا أَمَرَهُمْ وَيَفْعَلُونَ مَا يُؤْمَرُونَ ٧

7. එම්බල විශ්වාසීතයිනි! නුඹලාවද, නුඹලාගේ පවුලේ අයවද, ගින්නෙන් ආරක්ෂා කර ගනු. එහි ඉන්ධන වනුයේ මිනිසුන් සහ ගල්ය. ඒ කෙරෙහි (තම රාජකාරිය ඉටු කිරීමෙහිලා) දැඩි (මෙන්ම) දරුණු සුරදූතයින් වෙති. අල්ලාහ් ඔවුන්ට නියෝග කර ඇති දේට ඔවුන් අකීකරු නොවන්නෝය. තවද, ඔවුන්, තමන්ට නියෝග කරනු ලබන දේ පමණක් කරන්නෝය.

يَا أَيُّهَا الَّذِينَ كَفَرُوا لَا تَعْتَذِرُوا الْيَوْمَ ۖ إِنَّمَا تُجْزَوْنَ مَا كُنْتُمْ تَعْمَلُونَ ٨ ع

8. එම්බල අවිශ්වාසීතයිනි! මෙදින නිදහසට කරුණු නොදක්වනු. නුඹලා කළ දෙයටම නුඹලාට ප්‍රතිවිපාක දෙනු ලබන්නේය.

يَا أَيُّهَا الَّذِينَ آمَنُوا تُوبُوا إِلَى اللَّهِ تَوْبَةً نَصُوحًا ۖ عَسَىٰ رَبُّكُمْ أَنْ يُكَفِّرَ عَنْكُمْ سَيِّئَاتِكُمْ وَيُدْخِلَكُمْ جَنَّاتٍ تَجْرِي مِنْ تَحْتِهَا الْأَنْهَارُ يَوْمَ لَا يُخْزِي اللَّهُ النَّبِيَّ

9. එම්බල විශ්වාසීතයිනි! අවංක පසුතැවිලි වීමකින් යුතුව අල්ලාහ් වෙතට හැරෙනු. (මන්ද) නුඹලාගේ අධිපතියාණන් නුඹලාගේ ක්‍රියාවන්හි නපුරු (ප්‍රතිවිපාකයන්) නුඹලාගෙන් ඉවත් කර උද්‍යානයන්හි නුඹලාව ඇතුළු කරවනු ඇත. ඒ තුලින් ගංගාවන් ගලා බසිනු ඇත. එදින අල්ලාහ් වක්තෘවරයාවද, ඔහු සමග විශ්වාස කළ අයවද අවමන්

وَالَّذِينَ آمَنُوا مَعَهُ ۖ نُورُهُمْ يَسْعَىٰ بَيْنَ أَيْدِيهِمْ وَبِأَيْمَانِهِمْ يَقُولُونَ رَبَّنَا أَتْمِمْ لَنَا نُورَنَا وَاغْفِرْ لَنَا ۖ إِنَّكَ عَلَىٰ كُلِّ شَيْءٍ قَدِيرٌ ﴿٩﴾

නොකරන්නේය. ඔවුන්ගේ ආලෝකය ඔවුන්ගේ ඉදිරි පසින්ද, ඔවුන්ගේ දකුණු පසින්ද දිව යනු ඇත. ඔවුන්, 'අපගේ අධිපතියාණෙනි! අප සඳහා අපගේ ආලෝකය පරිපූර්ණ කරනු මැනව. තවද අපට ක්ෂමාව දෙනු මැනව. නියතවශයෙන්ම ඔබට සියලු දේ කෙරෙහි බලය ඇත'යි පවසන්නෝය.

يَا أَيُّهَا النَّبِيُّ جَاهِدِ الْكُفَّارَ وَالْمُنَافِقِينَ وَاغْلُظْ عَلَيْهِمْ ۚ وَمَأْوَاهُمْ جَهَنَّمُ ۖ وَبِئْسَ الْمَصِيرُ ﴿١٠﴾

10. එම්බල වක්තෘවරයාණෙනි! අවිශ්වාසිතයින්ටද කුහකයින්ටද එරෙහිව දැඩි ප්‍රයත්නය යොදවන්න. තවද ඔවුන්ට එරෙහිව දැඩිව සිටින්න. ඔවුන්ගේ වාසස්ථානය නිරය වේ. තවද එය නපුරු නවාතැනකි!

ضَرَبَ اللَّهُ مَثَلًا لِّلَّذِينَ كَفَرُوا امْرَأَتَ نُوحٍ وَامْرَأَتَ لُوطٍ ۖ كَانَتَا تَحْتَ عَبْدَيْنِ مِنْ عِبَادِنَا صَالِحَيْنِ فَخَانَتَاهُمَا فَلَمْ يُغْنِيَا عَنْهُمَا مِنَ اللَّهِ شَيْئًا وَقِيلَ ادْخُلَا النَّارَ مَعَ الدَّاخِلِينَ ﴿١١﴾

11. අල්ලාහ් අවිශ්වාස කළ අයහට නූහ්ගේ බිරිඳ සහ ලූත්ගේ බිරිඳගේ උදාහරණය ගෙන හැර දක්වන්නේය. ඔවුන් (දෙදෙනා) අපගේ දාසයින්ගෙන් ධාර්මිෂ්ඨකයින් දෙදෙනෙකු යටතේ සිටියහ. නමුත් ඔවුන් (දෙදෙනා) ඔවුන්ට විශ්වාස ද්‍රෝහිව ක්‍රියා කළහ. එබැවින් ඔවුන් (දෙදෙනා) වෙනුවෙන් අල්ලාහ්ට එරෙහිව ඔවුන්ට කිසිවක් කළ නොහැකි විය. තවද (ඔවුන් වෙත), 'නුඹලා දෙදෙනා පිවිසෙන්නන් සමග නිරා ගින්නෙහි පිවිසෙනු'යි පවසන ලදී.

وَضَرَبَ اللَّهُ مَثَلًا لِّلَّذِينَ آمَنُوا امْرَأَتَ فِرْعَوْنَ إِذْ قَالَتْ رَبِّ ابْنِ لِي عِندَكَ بَيْتًا فِي الْجَنَّةِ وَنَجِّنِي مِن فِرْعَوْنَ وَعَمَلِهِ وَنَجِّنِي مِنَ الْقَوْمِ الظَّالِمِينَ ﴿١٢﴾

12. තවද අල්ලාහ් විශ්වාස කළ අයහට ෆිර්අවුන්ගේ බිරිඳගේ උදාහරණය ගෙන හැර දක්වන්නේය. එම අවස්ථාවේදී ඇය, 'මාගේ අධිපතියාණනි! මා වෙනුවෙන් ඔබ අභියස ස්වර්ගයෙහි නිවසක් සාදා දෙනු මැනව. තවද මාව ෆිර්අවුන්ගෙන්ද ඔහුගේ ක්‍රියාවන්ගෙන්ද මුදවා ගනු මැනව. තවද මාව වැරදකාර ජනතාවගෙන් මුදවාගනු මැනව'යි කීවාය.

وَمَرْيَمَ ابْنَتَ عِمْرَانَ الَّتِي أَحْصَنَتْ

13. තවද ඉම්රාන්ගේ දියණිය මර්යම්(ගේ උදාහරණයද

فَرْجَهَا فَنَفَخْنَا فِيهِ مِنْ رُّوحِنَا وَصَدَّقَتْ بِكَلِمَٰتِ رَبِّهَا وَكُتُبِهِۦ وَكَانَتْ مِنَ الْقَٰنِتِينَ ﴿١٢﴾

විශ්වාසිතයින්හට ගෙන හැර දක්වන්නේය.) ඇය තම පතිවත රැක ගත්තාය. එබැවින් අපි ඔහු (දරුවා) තුල අපගේ ආත්මය පිඹුවෙමු. තවද ඇය තම අධිපතියාණන්ගේ වදන් සහ ඔහුගේ පුස්තකයන්ද සැබෑ කළාය. තවද අවනත වන්නන්ගෙන්ද කෙනෙක් වූවාය.



අල් මුල්ක්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

تَبٰرَكَ الَّذِىۡ بِيَدِهِ الۡمُلۡكُ وَهُوَ عَلٰى كُلِّ شَىۡءٍ قَدِيۡرُۙ ②

2. රාජධානිය තම අතෙහි දරන ඔහු ආශිර්වාදයෙන් පරිපූර්ණය. තවද ඔහු සියලු දේ කෙරෙහි බලය ඇත්තාය.

29-කොටස

الَّذِىۡ خَلَقَ الۡمَوۡتَ وَالۡحَيٰوةَ لِيَبۡلُوَكُمۡ اَيُّكُمۡ اَحۡسَنُ عَمَلًا ؕ وَهُوَ الۡعَزِيۡزُ الۡغَفُوۡرُۙ ③

3. ඔහු මරණය සහ ජීවිතය මවා ඇත්තේ නුඹලා අතරින් කවරෙකු ක්‍රියාවන්හි වඩාත් හොඳ දැයි ඔහු නුඹලාව පිරික්සනු පිණිසය. තවද ඔහු බලසම්පන්නය, අතිශයින්ම ක්ෂමාන්විතය.

الَّذِىۡ خَلَقَ سَبۡعَ سَمٰوٰتٍ طِبَاقًا ؕ مَا تَرٰى فِىۡ خَلۡقِ الرَّحۡمٰنِ مِنۡ تَفٰوُتٍ ؕ فَارۡجِعِ الۡبَصَرَ ۙ هَلۡ تَرٰى مِنۡ فُطُوۡرٍ ④

4. අහස් සත එකක් මත එකක් ලෙස මවා ඇත්තේ ඔහුමය. මහා කාරුණික (දෙවි)යාණන්ගේ මැවීමෙහි කිසිදු නොගැලපීමක් ඔබට දැකිය නොහැක. නැවත නැවතත් බලන්න. ඔබ කිසිදු දෝෂයක් දකින්නෙහිද?

ثُمَّ ارۡجِعِ الۡبَصَرَ كَرَّتَيۡنِ يَنۡقَلِبۡ اِلَيۡكَ الۡبَصَرُ خَاسِئًا وَّهُوَ حَسِيۡرٌ ⑤

5. පසුව දෙවන වතාවටත් නැවත නැවත බලන්න. ඔබගේ බැල්ම නිෂ්ඵලවද වෙහෙසට පත්වද ඔබ වෙතටම පෙරළා එන්නේය.

وَلَقَدۡ زَيَّنَّا السَّمَآءَ الدُّنۡيَا بِمَصَابِيۡحَ وَجَعَلۡنٰهَا رُجُوۡمًا لِّلشَّيٰطِيۡنِ وَاَعۡتَدۡنَا لَهُمۡ عَذَابَ السَّعِيۡرِ ⑥

6. තවද සැබැවින්ම අපි පහළම අහස පහන්වලින් අලංකාර කර ඇත්තෙමු. තවද අපි ඒවා ෂෙයිතාන්ව පලවා හරින්නට සාදා ඇත්තෙමු. තවද අපි ඔවුන් සඳහා ඇවිලෙන්නාවූ ගින්නේ දඬුවමක් පිළියෙල කර ඇත්තෙමු.

وَلِلَّذِيۡنَ كَفَرُوۡا بِرَبِّهِمۡ عَذَابُ جَهَنَّمَ ؕ وَبِئۡسَ الۡمَصِيۡرُ ⑦

7. එමෙන්ම තමන්ගේ අධිපතියාණන් කෙරෙහි අවිශ්වාස කළ අයහට නිරයේ දඬුවම ඇත. තවද එය නපුරු නවාතැනකි!

إِذَآ أُلْقُوا۟ فِيهَا سَمِعُوا۟ لَهَا شَهِيقًا وَهِىَ تَفُورُ ۝٨

8. ඔවුන් එහි ඇද දමනු ලබන කල්හි, ඔවුන් එය උතුරන්නාක් මෙන් එහි ගෙරහුමක් අසති.

تَكَادُ تَمَيَّزُ مِنَ ٱلْغَيْظِ ۖ كُلَّمَآ أُلْقِىَ فِيهَا فَوْجٌ سَأَلَهُمْ خَزَنَتُهَآ أَلَمْ يَأْتِكُمْ نَذِيرٌ ۝٩

9. එය වියරුවෙන් පිපිරෙන්නාක් මෙනි. එයට (අවිශ්වාසිතයින්ගෙන්) පිරිසක් ඇද දමනු ලබන සෑමවිටකම, එහි පාලකයන් ඔවුන්ගෙන්, 'නුඹලා වෙත අවවාදකරුවෙකු නොපැමිණියේදැ'යි අසන්නෝය.

قَالُوا۟ بَلَىٰ قَدْ جَآءَنَا نَذِيرٌ فَكَذَّبْنَا وَقُلْنَا مَا نَزَّلَ ٱللَّهُ مِن شَىْءٍ إِنْ أَنتُمْ إِلَّا فِى ضَلَـٰلٍ كَبِيرٍ ۝١٠

10. ඔවුන් (මෙසේ) පවසන්නෝය. "එසේය, සැබැවින්ම අවවාදකරුවෙක් අප වෙත පැමිණියේය. නමුත් අපි (ඔහුව) මුසාවාදියෙකු ලෙස සැළකුවෙමු. තවද අපි, 'අල්ලාහ් කිසිවක් පහළ කර නොමැත්තේය. නුඹලා ඉතා නොමගෙහි මිස නැතැ'යි පැවසුවෙමු".

وَقَالُوا۟ لَوْ كُنَّا نَسْمَعُ أَوْ نَعْقِلُ مَا كُنَّا فِىٓ أَصْحَـٰبِ ٱلسَّعِيرِ ۝١١

11. තවද ඔවුන්, 'අප සවන් දී තිබුණහොත් හෝ අප අවබෝධයෙන් යුතුව සිටියහොත් හෝ අපට දැවෙන්නාවූ ගින්නෙහි සහකරුවන් අතරට පත් නොවන්නට තිබුණි'යි පවසන්නෝය.

فَٱعْتَرَفُوا۟ بِذَنۢبِهِمْ فَسُحْقًا لِّأَصْحَـٰبِ ٱلسَّعِيرِ ۝١٢

12. මෙසේ ඔවුන් තමන්ගේ පාපොච්චාරණය කරගන්නෝය. එහෙත් නිරා ගින්නේ සහකරුවන්ට විනාශය අත් වේවා!

إِنَّ ٱلَّذِينَ يَخْشَوْنَ رَبَّهُم بِٱلْغَيْبِ لَهُم مَّغْفِرَةٌ وَأَجْرٌ كَبِيرٌ ۝١٣

13. සැබැවින්ම තම අධිපතියාණන්ට රහසිගතව බියදක්වන්නන් ගත්කල ඔවුනට සමාවද අතිමහත් තිළිණයද ඇත.

وَأَسِرُّوا۟ قَوْلَكُمْ أَوِ ٱجْهَرُوا۟ بِهِۦٓ ۖ إِنَّهُۥ عَلِيمٌۢ بِذَاتِ ٱلصُّدُورِ ۝١٤

14. තවද නුඹලා පවසන දේ සඟවා තැබුවද නැතහොත් එය හෙළි කළද, ඔහු (නුඹලාගේ) සිත්හි ඇති දේ ඉතා මැනැවින් දන්නේය.

أَلَا يَعْلَمُ مَنْ خَلَقَ ۖ وَهُوَ ٱللَّطِيفُ

15. (නුඹලාව) මවා ඇති ඔහු (එය)

الْخَبِيرُ ﴿١٥﴾

නොදන්නේද? තවද ඔහු සූක්ෂම ඥානය ඇත්තාය, සියල්ලෙහිම විමසිලිමත්ය.

هُوَ الَّذِي جَعَلَ لَكُمُ الْأَرْضَ ذَلُولًا فَامْشُوا فِي مَنَاكِبِهَا وَكُلُوا مِنْ رِزْقِهِ ۖ وَإِلَيْهِ النُّشُورُ ﴿١٦﴾

16. නුඹලාට පොළොව පහසු ආකාරයට කර ඇත්තේ ඔහුමය. එබැවින් නුඹලා එහි මාර්ගයන් ඔස්සේ ගමන් කරනු. තවද ඔහුගේ ජීවනෝපායෙන් අනුභව කරනු. තවද පුනරුත්ථානය ඔහු වෙතටමය.

أَأَمِنْتُمْ مَنْ فِي السَّمَاءِ أَنْ يَخْسِفَ بِكُمُ الْأَرْضَ فَإِذَا هِيَ تَمُورُ ﴿١٧﴾

17. අහසෙහි සිටින්නා නුඹලාව පොළොව තුලට ගිල්වා හදිසියෙන් ඇතිවන එම චලනයෙන් නුඹලා සුරක්ෂිත යැයි සිතන්නෙහුද?

أَمْ أَمِنْتُمْ مَنْ فِي السَّمَاءِ أَنْ يُرْسِلَ عَلَيْكُمْ حَاصِبًا ۖ فَسَتَعْلَمُونَ كَيْفَ نَذِيرِ ﴿١٨﴾

18. අහසෙහි සිටින්නා නුඹලාට එරෙහිව වැලි කුණාටුවක් නොඑවනු ඇතැයි නුඹලා ඔහුගෙන් සුරක්ෂිත යැයි නුඹලාට හැඟෙන්නේද? පසුව නුඹලා මාගේ අනතුරු ඇඟවීම කෙසේ (දරුණු) වූයේ දැයි දැනගන්නෙහුමය.

وَلَقَدْ كَذَّبَ الَّذِينَ مِنْ قَبْلِهِمْ فَكَيْفَ كَانَ نَكِيرِ ﴿١٩﴾

19. තවද ඇත්තෙන්ම ඔවුන්ට පෙර සිටි අය (මාගේ දූතයින්ව) මුසාවාදීන් ලෙස සැළකූහ. පසුව මාගේ දඬුවම කෙතරම් (වේදනාකාරී) වූයේද!

أَوَلَمْ يَرَوْا إِلَى الطَّيْرِ فَوْقَهُمْ صَافَّاتٍ وَيَقْبِضْنَ ۚ مَا يُمْسِكُهُنَّ إِلَّا الرَّحْمَٰنُ ۚ إِنَّهُ بِكُلِّ شَيْءٍ بَصِيرٌ ﴿٢٠﴾

20. ඔවුන්ට ඉහලින් පක්ෂීන්ව උන්ගේ පියාපත්, (ඒවා) චලනයෙන් තොරව විහිදුවමින්ද පසුව (තම ගොදුර වෙත හඹා යෑම සඳහා ඒවා) හකුළුවාලමින්ද සිටිනු ඔවුන් දැක නොතිබේද? උන්ව (ඉහලින්) රඳවා තබන්නේ මහා කාරුණික (දෙවි)යාණන් හැර අන් කිසිවෙකු නොවේ. සැබැවින්ම ඔහු සියලූ දේ දකින්නේය.

أَمَّنْ هَٰذَا الَّذِي هُوَ جُنْدٌ لَكُمْ يَنْصُرُكُمْ مِنْ دُونِ الرَّحْمَٰنِ ۚ إِنِ الْكَافِرُونَ إِلَّا

21. නැතහොත් මහා කාරුණික (දෙවි)යාණන්ට එරෙහිව නුඹලාගේ සේනාවක් ලෙස නුඹලාට උදව් කළ හැක්කේ කවරෙකුටද?

فِيْ غُرُوْرٍ ﴿٢١﴾

අවිශ්වාසිතයෝ මං මුලාවෙහි මිස නැත.

اَمَّنْ هٰذَا الَّذِيْ يَرْزُقُكُمْ اِنْ اَمْسَكَ رِزْقَهٗ ۚ بَلْ لَّجُّوْا فِيْ عُتُوٍّ وَّنُفُوْرٍ ﴿٢٢﴾

22. නැතහොත් ඔහු තම ජිවනෝපාය නවත්වා තැබුවහොත් නුඹලාට එම ජිවනෝපාය සපයන්නේ අන් කවරෙක්ද? නොඑසේය, නමුත් ඔවුන් කැරළි ගැසීම සහ පිළිකුල් කිරීමෙහි හිතුවක්කාරව එල්බගෙන සිටින්නෝය.

اَفَمَنْ يَّمْشِيْ مُكِبًّا عَلٰى وَجْهِهٖٓ اَهْدٰى اَمَّنْ يَّمْشِيْ سَوِيًّا عَلٰى صِرَاطٍ مُّسْتَقِيْمٍ ﴿٢٣﴾

23. කිමද! වඩාත් යහමග ලද්දා තම මුහුණ මුණින් අතට හෙළා ගමන් කරන්නාද? නැතහොත් සෘජු මාර්ගයෙහි කෙළින් ගමන් කරන්නාද?

قُلْ هُوَ الَّذِيْٓ اَنْشَاَكُمْ وَجَعَلَ لَكُمُ السَّمْعَ وَالْاَبْصَارَ وَالْاَفْـِٕدَةَ ۗ قَلِيْلًا مَّا تَشْكُرُوْنَ ﴿٢٤﴾

24. පවසන්න, 'නුඹලාව මවා එමෙන්ම නුඹලාට කන්ද ඇස්ද හදවත්ද ඇතිකළේ ඔහුමය. (නමුත්) නුඹලා කෘතඥතා දක්වන්නේ ස්වල්පයකි'.

قُلْ هُوَ الَّذِيْ ذَرَاَكُمْ فِي الْاَرْضِ وَاِلَيْهِ تُحْشَرُوْنَ ﴿٢٥﴾

25. පවසන්න, 'නුඹලාව පොළොවෙහි බෝ කළේ ඔහුමය. තවද නුඹලා එක්රැස් කරනු ලබන්නේද ඔහු වෙතටමය'.

وَيَقُوْلُوْنَ مَتٰى هٰذَا الْوَعْدُ اِنْ كُنْتُمْ صٰدِقِيْنَ ﴿٢٦﴾

26. තවද ඔවුන්, 'නුඹලා (ඇත්තෙන්ම) සත්‍යවාදීන් වෙත්නම් මෙම පොරොන්දුව කවදා (ඉටු) වන්නේදැ?'යි අසන්නෝය.

قُلْ اِنَّمَا الْعِلْمُ عِنْدَ اللّٰهِ ۖ وَاِنَّمَآ اَنَا نَذِيْرٌ مُّبِيْنٌ ﴿٢٧﴾

27. පවසන්න, '(ඒ ගැන) දැනුම ඇත්තේ අල්ලාහ් වෙත පමණි. තවද මම පැහැදිලි අවවාදකරුවෙක් පමණක් වෙමි'.

فَلَمَّا رَاَوْهُ زُلْفَةً سِيْٓـَٔتْ وُجُوْهُ الَّذِيْنَ كَفَرُوْا وَقِيْلَ هٰذَا الَّذِيْ كُنْتُمْ بِهٖ

28. නමුත් ඔවුන් එය සමීපයෙන් දකින විට අවිශ්වාස කළවුන්ගේ මුහුණු ශෝකයෙන් පීඩිත වුවා මෙන් පත්වන්නේය. තවද, 'නුඹලා ඉල්ලමින්

تَدَّعُوْنَ ﴿٢٨﴾

සිටි දේ මෙය වේයැ'යි පවසනු ලබන්නේය.

قُلْ اَرَءَيْتُمْ اِنْ اَهْلَكَنِيَ اللّٰهُ وَمَنْ مَّعِيَ اَوْ رَحِمَنَا ۙ فَمَنْ يُّجِيْرُ الْكٰفِرِيْنَ مِنْ عَذَابٍ اَلِيْمٍ ﴿٢٩﴾

29. 'මා හට කියා දෙනු. මාවද මා සමග සිටින අයවද අල්ලාහ් විනාශ කළේ නම් හෝ අප කෙරෙහි දයාව දැක්වුයේ නම් හෝ වේදනිය දඬුවමින් අවිශ්වාසිතයින්ට රැකවරණය දෙන්නේ අන් කවරෙක්දැ?'යි පවසන්න.

قُلْ هُوَ الرَّحْمٰنُ اٰمَنَّا بِهٖ وَعَلَيْهِ تَوَكَّلْنَا ۚ فَسَتَعْلَمُوْنَ مَنْ هُوَ فِيْ ضَلٰلٍ مُّبِيْنٍ ﴿٣٠﴾

30. 'මහා කාරුණික (දෙවි)යාණන් ඔහුය. ඔහු ගැන අපි විශ්වාස කර ඇත්තෙමු. තවද ඔහු කෙරෙහිම අපි අපගේ විශ්වාසය තබා ඇත්තෙමු. තවද ප්‍රත්‍යක්ෂ නොමගෙහි සිටින්නේ කවුරුන්දැයි නුඹලා විගසින්ම දැනගන්නෙහුමයැ'යි පවසන්න.

قُلْ اَرَءَيْتُمْ اِنْ اَصْبَحَ مَآؤُكُمْ غَوْرًا فَمَنْ يَّاْتِيْكُمْ بِمَآءٍ مَّعِيْنٍ ﴿٣١﴾

31. 'නුඹලාගේ ජලය (පොළොව) පතුලටම කිඳා බැස්සේ නම් නුඹලාට ගලායන (පිවිතුරු) ජලය ගෙන එන්නේ කවුරුන්දැයි මාහට කියා දෙනු'යි පවසන්න.




## අල් කලම්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

نٓ وَالْقَلَمِ وَمَا يَسْطُرُوْنَ ②

2. තින්ත කුඩුව(මත)ද පෑන (මත)ද ඔවුන් ලියන දේ මතද දිවුරමින්,

مَآ اَنْتَ بِنِعْمَةِ رَبِّكَ بِمَجْنُوْنٍ ③

3. ඔබගේ අධිපතියාණන්ගේ කරුණාවෙන් ඔබ උමතුවෙක් නොවන්නෙහිය.

وَاِنَّ لَكَ لَاَجْرًا غَيْرَ مَمْنُوْنٍ ④

4. තවද ඔබට නියතවශයෙන්ම නිම නොවන්නාවූ තිළිණයක් ඇත.

وَاِنَّكَ لَعَلٰى خُلُقٍ عَظِيْمٍ ⑤

5. තවද නියතවශයෙන්ම ඔබ අති ශ්‍රේෂ්ඨ වූ ගුණාංගයන් හිමි කර ගෙන ඇත්තෙහිය.

فَسَتُبْصِرُ وَيُبْصِرُوْنَ ⑥

6. තවද ඔබ විගසින් දකින්නෙහිය. එමෙන්ම ඔවුන්(ද) දකින්නෝය.

بِاَيِّكُمُ الْمَفْتُوْنُ ⑦

7. නුඹලාගෙන් කවරෙකු (උමතුවෙන්) පීඩිතව සිටින්නේදැයි (දකින්නෝය).

اِنَّ رَبَّكَ هُوَ اَعْلَمُ بِمَنْ ضَلَّ عَنْ سَبِيْلِهٖ ۠ وَهُوَ اَعْلَمُ بِالْمُهْتَدِيْنَ ⑧

8. නියතවශයෙන්ම ඔහුගේ මාර්ගයෙන් නොමග ගියේ කවුරුන්දැයි ඔබගේ අධිපතියාණන් මැනවින් දන්නේය. තවද මගපෙන්වීම අනුගමනය කරන්නේ කවුරුන්දැයි ඔහු මැනැවින් දන්නේය.

فَلَا تُطِعِ الْمُكَذِّبِيْنَ ⑨

9. එබැවින් (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන්ගේ අභිලාෂයන්ට යටත් නොවන්න.

وَدُّوْا لَوْ تُدْهِنُ فَيُدْهِنُوْنَ ⑩

10. ඔබ නම්‍යශීලී වන්නේ නම් ඔවුන්ද නම්‍යශීලී වන්නට කැමති වෙති.

وَلَا تُطِعْ كُلَّ حَلَّافٍ مَّهِيْنٍ ⑪

11. තවද (නිකරුණේ) දිවුරන්නාවූ කිසිම නීචයෙකුට අවනත නොවන්න.

هَمَّازٍ مَّشَّآءٍ بِنَمِيمٍ ﴿١٢﴾

12. (ඔහු) කේලම් කියන්නාය. අපහාස කරමින් සැරිසරන්නාය.

مَّنَّاعٍ لِّلْخَيْرِ مُعْتَدٍ اَثِيمٍ ﴿١٣﴾

13. යහකම් තහනම් කරන්නාය, සීමාව ඉක්මවන්නාය, පාපිෂ්ඨයාය.

عُتُلٍّ بَعْدَ ذٰلِكَ زَنِيمٍ ﴿١٤﴾

14. නොහික්මුණුද, එයට අමතරව, අවජාතකයාය.

اَنْ كَانَ ذَا مَالٍ وَّبَنِينَ ﴿١٥﴾

15. මෙයට හේතුව ඔහු ධනය හා දරුවන් හිමි කොට ඇති බැවිනි.

اِذَا تُتْلٰى عَلَيْهِ اٰيٰتُنَا قَالَ اَسَاطِيرُ الْاَوَّلِينَ ﴿١٦﴾

16. අපගේ වදන් ඔහුට පාරායනා කරනු ලබන විට ඔහු, '(මෙය) පැරැන්නන්ගේ කතාන්තරයෑ!'යි පවසන්නේය.

سَنَسِمُهُ عَلَى الْخُرْطُومِ ﴿١٧﴾

17. අපි ඔහුගේ නාස්පුඩුවට සළකුණු දමන්නෙමු.

اِنَّا بَلَوْنٰهُمْ كَمَا بَلَوْنَآ اَصْحٰبَ الْجَنَّةِ ۚ اِذْ اَقْسَمُوا لَيَصْرِمُنَّهَا مُصْبِحِينَ ﴿١٨﴾

18. අපි උද්‍යානයේ හිමිකරුවන්ව පිරික්සුවාක් මෙන් නියතවශයෙන්ම අපි ඔවුන්වද පිරික්සා ඇත්තෙමු. එවිට ඔවුන් උදෑසනෙහි එහි (සියළු) ඵල නිශ්චිතවම නෙලාගන්නේමයැයි දිවුරුම් දුන්හ.

وَلَا يَسْتَثْنُونَ ﴿١٩﴾

19. තවද ඔවුන් 'දෙවියන් අභිමත වන්නේ නම්'යැයි කිසිදු ප්‍රකාශයක් නොකළහ.

فَطَافَ عَلَيْهَا طَآئِفٌ مِّنْ رَّبِّكَ وَهُمْ نَآئِمُونَ ﴿٢٠﴾

20. පසුව ඔවුන් නින්දෙහි සිටියදී ඔබගේ අධිපතියාණන්ගෙන් මහා විපතක් එය වටලා ගත්තේය.

فَاَصْبَحَتْ كَالصَّرِيمِ ﴿٢١﴾

21. පසුව එය කපා හරින ලද (උයනක්) මෙන් උදෑසනදී දකින්නට ලැබුනි.

فَتَنَادَوْا مُصْبِحِينَ ﴿٢٢﴾

22. එබැවින් ඔවුන් අළුයම (උදාවෙත්ම) එකිනෙකාට අඬගැසූහ.

اَنِ اغْدُوا عَلٰى حَرْثِكُمْ اِنْ كُنْتُمْ صٰرِمِينَ ﴿٢٣﴾

23. නුඹලා අස්වැන්න නෙලාගන්නට නම්, නුඹලාගේ කෙත්වලට උදේ පාන්දරින්ම යනු(යි පවසමින්).

فَانْطَلَقُوْا وَهُمْ يَتَخَافَتُوْنَ ﴿٢٤﴾

24. තවද ඔවුන් එකිනෙකාට සිහින් හඬින් කතා කරමින් පිටත්ව ගියහ.

اَنْ لَّا يَدْخُلَنَّهَا الْيَوْمَ عَلَيْكُمْ مِّسْكِيْنٌ ﴿٢٥﴾

25. 'කිසිම දුප්පත් මිනිසෙකු අද දින නුඹලාට එරෙහිව එහි ඇතුළු නොවේවා'(යි පවසමින්).

وَّغَدَوْا عَلٰى حَرْدٍ قٰدِرِيْنَ ﴿٢٦﴾

26. තවද ඔවුහු මසුරුකම් කිරීමේ අධිෂ්ඨානයෙන් උදේ පාන්දරින්ම පිටත්ව ගියහ.

فَلَمَّا رَاَوْهَا قَالُوْۤا اِنَّا لَضَآلُّوْنَ ﴿٢٧﴾

27. නමුත් ඔවුන් එය දුටු කල්හි ඔවුන්, 'නියතවශයෙන්ම අපි (අපගේ මග) මුළා කරගත්තෙමු'යි පැවසූහ.

بَلْ نَحْنُ مَحْرُوْمُوْنَ ﴿٢٨﴾

28. 'නොඑසේය, අපගෙන් සියල්ල අහිමි වී ඇත.'

قَالَ اَوْسَطُهُمْ اَلَمْ اَقُلْ لَّكُمْ لَوْلَا تُسَبِّحُوْنَ ﴿٢٩﴾

29. ඔවුනතරින් ඉතා හොඳ අයෙක් (මෙසේ) කීවේය. "මා නුඹලාට, 'නුඹලා (දෙවියන්ව) සුවිශුද්ධ නොකරන්නේ මන්දැ?'යි නොකීවෙමිද?"

قَالُوْا سُبْحٰنَ رَبِّنَاۤ اِنَّا كُنَّا ظٰلِمِيْنَ ﴿٣٠﴾

30. ඔවුහු, 'අපගේ අධිපතියාණන් සුවිශුද්ධය. නියතවශයෙන්ම අපි වරදකරුවන් වී ඇත්තෙමු'යි පැවසූහ.

فَاَقْبَلَ بَعْضُهُمْ عَلٰى بَعْضٍ يَّتَلَاوَمُوْنَ ﴿٣١﴾

31. පසුව ඔවුන්ගෙන් සමහරුන් එකිනෙකාට දොස් නගමින් අන් සමහරුන් වෙතට හැරුණහ.

قَالُوْا يٰوَيْلَنَاۤ اِنَّا كُنَّا طٰغِيْنَ ﴿٣٢﴾

32. ඔවුහු (මෙසේ) කීහ. 'අහෝ, අපට වූ විපත! සැබැවින්ම අපි සීමාව ඉක්මවූවන් වී ඇත්තෙමු'.

عَسٰى رَبُّنَاۤ اَنْ يُّبْدِلَنَا خَيْرًا مِّنْهَاۤ اِنَّاۤ اِلٰى رَبِّنَا رٰغِبُوْنَ ﴿٣٣﴾

33. 'අපගේ අධිපතියාණන්ට, මේ වෙනුවට මීට වඩා හොඳ (උයනක්) අපට ලබා දෙන්නට පුළුවන. නියතවශයෙන්ම අපි අපගේ අධිපතියාණන් වෙත බැගෑපත්ව ඉල්ලා සිටින්නන් වෙමු'.

كَذٰلِكَ الْعَذَابُ ؕ وَلَعَذَابُ الْاٰخِرَةِ اَكْبَرُ ۘ لَوْ كَانُوْا يَعْلَمُوْنَ ﴿٣٤﴾

34. (මෙලොවෙහි) දඬුවම එබඳුය. තවද නිශ්චිතවම පරලොවෙහි දඬුවම අති මහත්ය. ඔවුන් දැන සිටියා නම්!

إِنَّ لِلْمُتَّقِينَ عِنْدَ رَبِّهِمْ جَنَّٰتِ ٱلنَّعِيمِ ﴿٣٥﴾

35. ඇත්තෙන්ම බියබැතිමතුන් සඳහා ඔවුන්ගේ අධිපතියාණන් වෙත සෞභාග්‍යයෙන් යුත් උද්‍යානයන් ඇත.

أَفَنَجْعَلُ ٱلْمُسْلِمِينَ كَٱلْمُجْرِمِينَ ﴿٣٦﴾

36. අපි යටහත් පහත්වන්නන්ව වරදකරුවන් මෙන් පත් කරගන්නෙමුද?

مَا لَكُمْ كَيْفَ تَحْكُمُونَ ﴿٣٧﴾

37. නුඹලාට සිදුවී ඇත්තේ කුමක්ද? නුඹලා කෙලෙස විනිශ්චය කරන්නෙහුද!

أَمْ لَكُمْ كِتَٰبٌ فِيهِ تَدْرُسُونَ ﴿٣٨﴾

38. නුඹලා කියවන්නාවූ ධර්ම ග්‍රන්ථයක් නුඹලා වෙත තිබේද?

إِنَّ لَكُمْ فِيهِ لَمَا تَخَيَّرُونَ ﴿٣٩﴾

39. එනම් නුඹලා තෝරාගන්නා ඕනෑම දෙයක් නියතවශයෙන්ම නුඹලාට ලැබෙන බව එහි (සඳහන් වී) තිබේද?

أَمْ لَكُمْ أَيْمَٰنٌ عَلَيْنَا بَٰلِغَةٌ إِلَىٰ يَوْمِ ٱلْقِيَٰمَةِ إِنَّ لَكُمْ لَمَا تَحْكُمُونَ ﴿٤٠﴾

40. නැතහොත් නුඹලා නියෝග කරන සියල්ල නියතවශයෙන්ම නුඹලාට ලැබෙනු ඇතැයි යන්නෙන් පුනරුත්ථාන දිනය දක්වා අප හා බැඳුනු කිසියම් ප්‍රතිඥාවක් නුඹලා වෙත තිබේද?

سَلْهُمْ أَيُّهُم بِذَٰلِكَ زَعِيمٌ ﴿٤١﴾

معانقة ١ عند المتقدمين

41. ඒ ගැන වගකියන්නා ඔවුනතුරින් කවුරුන්දැයි ඔවුන්ගෙන් අසන්න.

أَمْ لَهُمْ شُرَكَآءُ فَلْيَأْتُوا۟ بِشُرَكَآئِهِمْ إِن كَانُوا۟ صَٰدِقِينَ ﴿٤٢﴾

42. නැතහොත්, (දෙවියන්ට සමාන තැබූ) 'හවුල්කරුවන්' කිසිවෙක් ඔවුන් වෙත සිටිත්ද? එසේ ඔවුන් සත්‍යය කතා කරන්නේ නම්, ඔවුන්ගේ එම 'හවුල්කරුවන්ව' ඉදිරිපත් කරත්වා.

يَوْمَ يُكْشَفُ عَن سَاقٍ وَيُدْعَوْنَ إِلَى ٱلسُّجُودِ فَلَا يَسْتَطِيعُونَ ﴿٤٣﴾

43. එදිනෙහිදී සත්‍යය එළිදරව් කරනු ලබන්නේය. එමෙන්ම ඔවුන් යටහත්ව නැමදුම් කිරීම වෙත කැඳවනු ලබන්නෝය. එහෙත් ඔවුනට (එසේ කිරීමට) හැකියාවක් නොවනු ඇත.

خَٰشِعَةً أَبْصَٰرُهُمْ تَرْهَقُهُمْ ذِلَّةٌ

44. ඔවුන්ගේ නෙත් පහතට යොමු වී

وَقَدۡ كَانُوۡا يُدۡعَوۡنَ اِلَى السُّجُوۡدِ وَهُمۡ سٰلِمُوۡنَ ﴿٤٣﴾

තිබෙනු ඇත. (තවද) නින්දාව ඔවුන්ව වෙළාගනු ඇත. තවද ඔවුන් යහතින් සිටයදී ඇත්තෙන්ම ඔවුන් යටහත්ව නැමදුම් කිරීම වෙතට කැඳවනු ලැබූහ. (නමුත් ඔවුන් අවනත නොවූහ).

فَذَرۡنِىۡ وَمَنۡ يُّكَذِّبُ بِهٰذَا الۡحَدِيۡثِ‌ؕ سَنَسۡتَدۡرِجُهُمۡ مِّنۡ حَيۡثُ لَا يَعۡلَمُوۡنَۙ ﴿٤٤﴾

45. එබැවින් මා සහ (අපගේ) මෙම වදන් ප්‍රතික්ෂේප කරන අයව හැර දමනු. ඔවුන් නොදන්නා තැනකින් අපි ඔවුන්ව (විනාශය කරා) ක්‍රමක්‍රමයෙන් ඇද දමන්නෙමු.

وَاُمۡلِىۡ لَهُمۡ‌ؕ اِنَّ كَيۡدِىۡ مَتِيۡنٌ ﴿٤٥﴾

46. තවද මම ඔවුන්ට කාල අවකාශය දෙමි. නියතවශයෙන්ම මාගේ සැලැස්ම ශක්තිමත්ය.

اَمۡ تَسۡـَٔلُهُمۡ اَجۡرًا فَهُمۡ مِّنۡ مَّغۡرَمٍ مُّثۡقَلُوۡنَ‌ۚ ﴿٤٦﴾

47. ඔබ ඔවුන්ගෙන් ප්‍රතිලාභයක් ඉල්ලන්නෙහිද? ඒ හේතුවෙන් ඔවුන් (අධික) ණයබරින් පටවනු ලබන්නේද?

اَمۡ عِنۡدَهُمُ الۡغَيۡبُ فَهُمۡ يَكۡتُبُوۡنَ ﴿٤٧﴾

48. ගුප්ත දේ (පිළිබඳව දැනුම) ඔවුන් සතුව තිබේද? එමනිසා ඔවුන් ඒවා ලියා තබන්නෝද?

فَاصۡبِرۡ لِحُكۡمِ رَبِّكَ وَلَا تَكُنۡ كَصَاحِبِ الۡحُوۡتِ‌ۘ اِذۡ نَادٰى وَهُوَ مَكۡظُوۡمٌؕ ﴿٤٨﴾

49. එබැවින් ඔබගේ අධිපතියාණන්ගේ නියෝගයෙහි (එය ඉටු කිරීමේදී) ඔබ ස්ථිරසාර වන්න. තවද මත්ස්‍යයාගේ (බඩතුල වූ) මිනිසා මෙන් නොවන්න. ඔහු (තම අධිපතියාණන්ව) අයැදූ කල්හි ඔහු අධික ශෝකයෙන් පසුවිය.

لَوۡلَاۤ اَنۡ تَدٰرَكَهٗ نِعۡمَةٌ مِّنۡ رَّبِّهٖ لَنُبِذَ بِالۡعَرَآءِ وَهُوَ مَذۡمُوۡمٌ ﴿٤٩﴾

50. ඔහුගේ අධිපතියාණන්ගෙන් අනුග්‍රහයක් ඔහු වෙත සම්පප නොවූයේ නම් ඔහු නියතවශයෙන්ම හිස් වූ වෙරළ තිරුවෙහි ඇද දමන්නට තිබුණි. තවද ඔහු (තම ජනතාවගේ) දොස් පැවරුමට ලක් වන්නට තිබුණි.

فَاجۡتَبٰهُ رَبُّهٗ فَجَعَلَهٗ مِنَ الصّٰلِحِيۡنَ ﴿٥٠﴾

51. නමුත් ඔහුගේ අධිපතියාණන් ඔහුව තෝරාගත්තේය. පසුව ඔහුව ධාර්මිෂ්ඨකයින්ගෙන් (කෙනෙක්) කළේය.

وَاِنْ يَّكَادُ الَّذِيْنَ كَفَرُوْا لَيُزْلِقُوْنَكَ بِاَبْصَارِهِمْ لَمَّا سَمِعُوا الذِّكْرَ وَيَقُوْلُوْنَ اِنَّهٗ لَمَجْنُوْنٌ ﴿٥٢﴾

52. තවද අවිශ්වාස කළ අය අනුශාසනාවට සවන් දෙන විට තමන්ගේ (කෝපවූ) බැල්මෙන් ඔබව (දෙවියන්ගෙන් දෙනු ලැබූ තරාතිරමින්) නෙරපා දැමීමට තැත් කරති. තවද ඔවුන් 'නිශ්චිතවම මොහු උමතුවෙකි'යි පවසති.

وَمَا هُوَ اِلَّا ذِكْرٌ لِّلْعٰلَمِيْنَ ﴿٥٣﴾

53. නොඑසේය, එය සර්ව ලෝකයන්ට අධිපතියාණන්ගේ අනුශාසනාවක් මිස අන් කිසිවක් නැත.




අල් හාක්කහ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡحَآقَّةُ ۙ‏ ۝٢

2. සැබැවින්ම සිදුවන්නකි!

مَا الۡحَآقَّةُ‌ ۚ‏ ۝٣

3. සැබැවින්ම සිදුවීම යනු කුමක්ද?

وَمَاۤ اَدۡرٰٮكَ مَا الۡحَآقَّةُ ؕ‏ ۝٤

4. තවද සැබැවින්ම සිදුවීම යනු කුමක්දැයි ඔබට දැන්වූයේ කුමක්ද?

كَذَّبَتۡ ثَمُوۡدُ وَعَادٌۢ بِالۡقَارِعَةِ‏ ۝٥

*5. සමුද් (ගෝත්‍රිකයින්)ද ආද් (ගෝත්‍රිකයින්)ද (සුනුවිසුණු කරන්නා වූ) විපත ගැන විශ්වාස කිරීමට ප්‍රතික්ෂේප කළෝය.

فَاَمَّا ثَمُوۡدُ فَاُهۡلِكُوۡا بِالطَّاغِيَةِ‏ ۝٦

6. පසුව සමුද් ගත්කල ඔවුන් අසීමිත විපතකින් විනාශ කරනු ලැබූහ.

وَاَمَّا عَادٌ فَاُهۡلِكُوۡا بِرِيۡحٍ صَرۡصَرٍ عَاتِيَةٍ ۙ‏ ۝٧

7. තවද ආද් ගත්කල ඔවුන් භයානක චණ්ඩ මාරුතයෙන් විනාශ කරනු ලැබූහ.

سَخَّرَهَا عَلَيۡهِمۡ سَبۡعَ لَيَالٍ وَّثَمٰنِيَةَ اَيَّامٍ ۙ حُسُوۡمًا ۙ فَتَرَى الۡقَوۡمَ فِيۡهَا صَرۡعٰى ۙ كَاَنَّهُمۡ اَعۡجَازُ نَخۡلٍ خَاوِيَةٍ‌ ۚ‏ ۝٨

8. ඔහු එය ඔවුනට එරෙහිව රාත්‍රී හතක් සහ දවාල අටක් තිස්සේ නොකඩවා හමා යෑමට සැලැස්වූයේය. එබැවින් එම ජනතාව, ඔවුන් බිමට හෙළනු ලැබූ රට ඉඳි කඳන් මෙන් මුණින් අතට වැතිරී සිටිනු ඔබ දකින්නෙහිය.

*සටහන. 5: ඇත්තෙන්ම (اَلْقَارِعَةُ) 'අල්-කාරිඅහ්' නම් 101 වැනි පරිච්ඡේදයේ 5,6 වගන්ති වල සඳහන් (يَوْمَ يَكُوْنُ النَّاسُ كَالْفَرَاشِ الْمَبْثُوْثِ ۝ وَتَكُوْنُ الْجِبَالُ كَالْعِهْنِ الْمَنْفُوْشِ ۝) මෙම කුර්ආන් වාක්‍යයේ විවරණයම මෙහි සඳහන් වී ඇත. එනම් එදින මනුෂ්‍ය වර්ගයා විසිරුණු සලබයන් මෙන් පත්වනු ඇත. තවද කඳු විසිරී ගිය ලොම් බවට පත්වනු ඇත. එබැවින් එය සාමාන්‍ය විසිරී යෑමක් නොව නමුත් ඉමහත් වූ විපතක් පෙන්නුම් කරයි. එය H-බෝම්බ සහ නියුට්‍රෝන් බෝම්බ යනාදි නිපදවන ලද්දක් මෙන්ය. මෙහි සඳහන් වන පිපිරීමේ තරම කඳු සුනුවිසුණු වී යා හැක්කක් මෙන්ය.

فَهَلۡ تَرَىٰ لَهُم مِّنۢ بَاقِيَةٖ ﴿٩﴾

9. එසේනම් ඔවුන්ගෙන් ඉතිරි වී සිටින කිසිවෙකුව ඔබ දකින්නෙහිද?

وَجَآءَ فِرۡعَوۡنُ وَمَن قَبۡلَهُۥ وَٱلۡمُؤۡتَفِكَٰتُ بِٱلۡخَاطِئَةِ ﴿١٠﴾

10. එමෙන්ම ෆිර්අවුන්ද, ඔහුට පෙර සිටි අයද, සුනුවිසුණු කරන ලද ජනාවාසයන්ද පාපයන්හි (නිරතව) සිටියහ.

فَعَصَوۡاْ رَسُولَ رَبِّهِمۡ فَأَخَذَهُمۡ أَخۡذَةٗ رَّابِيَةً ﴿١١﴾

11. තවද, ඔවුන්ගේ අධිපතියාණන්ගේ දූතයාණන්ට ඔවුන් අකීකරු වූහ. එමනිසා ඔහු ඔවුන්ව සදා ස්ථිරවූ දැඩි ග්‍රහණයකින් හසු කළේය.

إِنَّا لَمَّا طَغَا ٱلۡمَآءُ حَمَلۡنَٰكُمۡ فِي ٱلۡجَارِيَةِ ﴿١٢﴾

12. සැබැවින්ම, ජල (මට්ටම) ඉහල නැගුනු අවස්ථාවේදී අපි නුඹලාව නැවෙහි ඉසිලියෙමු.

لِنَجۡعَلَهَا لَكُمۡ تَذۡكِرَةٗ وَتَعِيَهَآ أُذُنٞ وَٰعِيَةٞ ﴿١٣﴾

13. අප (එසේ) කළේ, එය නුඹලාට සිහිකිරීමක් වනු පිණිසද, ධාරණ ශක්තිය ඇති කන්වලට එය ධාරණය කර ගනු පිණිසද වේ.

فَإِذَا نُفِخَ فِي ٱلصُّورِ نَفۡخَةٞ وَٰحِدَةٞ ﴿١٤﴾

14. තවද සූර් (නලාවෙ)හි එක් පිඹීමකින් පිඹිනු ලැබූ කල්හි.

وَحُمِلَتِ ٱلۡأَرۡضُ وَٱلۡجِبَالُ فَدُكَّتَا دَكَّةٗ وَٰحِدَةٗ ﴿١٥﴾

15. එමෙන්ම මහපොළොවද, කඳු පර්වතද ඔසවනු ලැබ එකම ගැටීමකින් සුනුවිසුණු කරනු ලබන්නේය.

فَيَوۡمَئِذٖ وَقَعَتِ ٱلۡوَاقِعَةُ ﴿١٦﴾

16. එදිනෙහිදී (මහත් වූ) සිද්ධිය සිදුවන්නේය.

وَٱنشَقَّتِ ٱلسَّمَآءُ فَهِيَ يَوۡمَئِذٖ وَاهِيَةٞ ﴿١٧﴾

17. තවද අහස දෙපළු වී එදින එය බෙලහීන වනු ඇත.

وَٱلۡمَلَكُ عَلَىٰٓ أَرۡجَآئِهَاۚ وَيَحۡمِلُ عَرۡشَ رَبِّكَ فَوۡقَهُمۡ يَوۡمَئِذٖ ثَمَٰنِيَةٞ ﴿١٨﴾

18. තවද සුරදූතයින් එහි පැතිවල (සිටගනිමින්)ද, තවද එදින ඔවුන්ට ඉහලින් (සුරදූතයින්) අට දෙනා ඔබගේ අධිපතියාණන්ගේ සිංහාසනය උසුලමින්ද සිටිනු ඇත.

يَوۡمَئِذٖ تُعۡرَضُونَ لَا تَخۡفَىٰ مِنكُمۡ خَافِيَةٞ ﴿١٩﴾

19. එදිනෙහිදී (දෙවියන් අභියස) නුඹලා ඉදිරිපත් කරනු ලබන්නෙහුය. (තවද) නුඹලාගේ කිසිදු රහසක් සැඟවී නොතිබෙනු ඇත.

فَأَمَّا مَنْ أُوتِيَ كِتَٰبَهُۥ بِيَمِينِهِۦ فَيَقُولُ هَآؤُمُ ٱقْرَءُوا۟ كِتَٰبِيَهْ ﴿٢٠﴾

20. පසුව යමෙකුට තම දකුණතෙහි තම (ක්‍රියා) වාර්තාව දෙනු ලබන්නේද. ඔහු (මෙසේ) කියනු ඇත. 'එනු. මාගේ වාර්තාව කියවනු'

إِنِّى ظَنَنتُ أَنِّى مُلَٰقٍ حِسَابِيَهْ ﴿٢١﴾

21. 'මා මාගේ ගණන් විමසීමට නියතවශයෙන්ම මුහුණ දෙනු ඇතැයි මම දැන සිටියෙමි'.

فَهُوَ فِى عِيشَةٍ رَّاضِيَةٍ ﴿٢٢﴾

22. එබැවින් ඔහු ආනන්දනීය ජීවිතයක් ලබනු ඇත.

فِى جَنَّةٍ عَالِيَةٍ ﴿٢٣﴾

23. උසස් වූ උද්‍යානයෙහි.

قُطُوفُهَا دَانِيَةٌ ﴿٢٤﴾

24. එහි පළතුරු පොකුරු වශයෙන් ඉතා සමීපව තිබෙනු ඇත.

كُلُوا۟ وَٱشْرَبُوا۟ هَنِيٓـًٔا بِمَآ أَسْلَفْتُمْ فِى ٱلْأَيَّامِ ٱلْخَالِيَةِ ﴿٢٥﴾

25. 'ගත වූ දිනයන්හි නුඹලා කළ (යහපත්) ක්‍රියාවන් හේතු කොට ගෙන ප්‍රමෝදයෙන් අනුභව කරනු. තවද පානය කරනු'.

وَأَمَّا مَنْ أُوتِىَ كِتَٰبَهُۥ بِشِمَالِهِۦ فَيَقُولُ يَٰلَيْتَنِى لَمْ أُوتَ كِتَٰبِيَهْ ﴿٢٦﴾

26. නමුත් යමෙකුට තම වමතෙහි තම (ක්‍රියා) වාර්තාව දෙනු ලබන්නේද, ඔහු (මෙසේ) කියනු ඇත. 'අහෝ මාගේ වාර්තාව මට නොදෙන ලද්දේ නම්!'

وَلَمْ أَدْرِ مَا حِسَابِيَهْ ﴿٢٧﴾

27. 'තවද මාගේ ගණන් ගැනීමට කුමක් වූයේ දැයි මා නොදැන සිටියා නම්!'

يَٰلَيْتَهَا كَانَتِ ٱلْقَاضِيَةَ ﴿٢٨﴾

28. 'අහෝ එය (තීන්දුව) මාගේ අවසාන ඉරණම වූයේ නම්!'

مَآ أَغْنَىٰ عَنِّى مَالِيَهْ ﴿٢٩﴾

29. 'මාගේ වස්තූන් මට කිසිදු ප්‍රයෝජනයක් නොවීය'.

هَلَكَ عَنِّى سُلْطَٰنِيَهْ ﴿٣٠﴾

30. 'මාගේ බලපුළුවන්කම මාගෙන් වැනසී ගොස්ය'.

خُذُوهُ فَغُلُّوهُ ﴿٣١﴾

31. 'ඔහුව හසුකරනු තවද ඔහුට විලංගු දමනු'(යි සුරදූතයින් අණ කරනු ලබන්නෝය).

ثُمَّ ٱلْجَحِيمَ صَلُّوهُ ﴿٣٢﴾

32. 'පසුව ඔහුව නිරයට ඇද දමනු'.

33. 'පසුව රියන් හැත්තෑවක් දිගැති දම්වැලකින් ඔහුව බැඳ තබනු'.

ثُمَّ فِي سِلْسِلَةٍ ذَرْعُهَا سَبْعُونَ ذِرَاعًا فَاسْلُكُوهُ ﴿٣٣﴾

34. 'සැබැවින්ම ඔහු අති ශ්‍රේෂ්ඨ අල්ලාහ් කෙරෙහි විශ්වාස කළේ නැත'.

إِنَّهُ كَانَ لَا يُؤْمِنُ بِاللَّهِ الْعَظِيمِ ﴿٣٤﴾

35. 'තවද ඔහු දුගින්ට ආහාර දීම ගැන උනන්දු කළේ නැත'.

وَلَا يَحُضُّ عَلَىٰ طَعَامِ الْمِسْكِينِ ﴿٣٥﴾

36. 'එනිසා ඔහුට අද දින මෙහි කිසිදු මිතුරෙකු නොවනු ඇත'.

فَلَيْسَ لَهُ الْيَوْمَ هَاهُنَا حَمِيمٌ ﴿٣٦﴾

37. 'තවද තුවාල වලින් සේදී යන සැරව හැරෙන්නට කිසිදු ආහාරයක් නොවනු ඇත'.

وَلَا طَعَامٌ إِلَّا مِنْ غِسْلِينٍ ﴿٣٧﴾

38. 'පව්කරුවන් මිස එය කිසිවෙක් අනුභව නොකරන්නෝය'.

لَا يَأْكُلُهُ إِلَّا الْخَاطِئُونَ ﴿٣٨﴾ ٣٨

39. එහෙයින් නුඹලා දකින සියල්ල මත දිවුරමි.

فَلَا أُقْسِمُ بِمَا تُبْصِرُونَ ﴿٣٩﴾

40. තවද නුඹලා නොදකින සියල්ල මතද.

وَمَا لَا تُبْصِرُونَ ﴿٤٠﴾

41. නියතවශයෙන්ම මෙය ගෞරවනීය දූතයාණන්ගේ වදනකි.

إِنَّهُ لَقَوْلُ رَسُولٍ كَرِيمٍ ﴿٤١﴾

42. තවද මෙය කිසිදු කවියෙකුගේ වදනක් නොවේ. නුඹලා විශ්වාස කරන්නේ ස්වල්පයකි!

وَمَا هُوَ بِقَوْلِ شَاعِرٍ قَلِيلًا مَا تُؤْمِنُونَ ﴿٤٢﴾

43. තවද මෙය කිසිදු පේන කියන්නෙකුගේ වදනක් නොවේ. නුඹලා දැනමුතුකම් ලබා ගන්නේ ස්වල්පයකි!

وَلَا بِقَوْلِ كَاهِنٍ قَلِيلًا مَا تَذَكَّرُونَ ﴿٤٣﴾

44. (මෙය) සර්ව ලෝකයන්හි අධිපතියාණන්ගෙන් පහළ වූවකි.

تَنْزِيلٌ مِنْ رَبِّ الْعَالَمِينَ ﴿٤٤﴾

45. තවද ඔහු අප වෙත කුමක් හෝ ප්‍රකාශයක් ව්‍යාජ ලෙස ආරෝපණය කළහොත්,

وَلَوْ تَقَوَّلَ عَلَيْنَا بَعْضَ الْأَقَاوِيلِ ﴿٤٥﴾

| | |
|---|---|
| 46. නියතවශයෙන්ම අපි ඔහුව දකුණතින් ග්‍රහණය කරගන්නෙමු. | لَاَخَذۡنَا مِنۡهُ بِالۡيَمِيۡنِۙ ﴿٤٦﴾ |
| 47. පසුව නියතවශයෙන්ම අපි ඔහුගේ ජීව නහරය සිඳ දමන්නෙමු. | ثُمَّ لَقَطَعۡنَا مِنۡهُ الۡوَتِيۡنَۖ ﴿٤٧﴾ |
| 48. තවද නුඹලාගෙන් කිසිවෙකුට (අපගේ දඬුවමින්) ඔහුට රැකවරණය දිය නොහැකිය. | فَمَا مِنۡكُمۡ مِّنۡ اَحَدٍ عَنۡهُ حٰجِزِيۡنَ ﴿٤٨﴾ |
| 49. තවද සැබැවින්ම මෙය බියබැතිමතුන් හට අනුශාසනාවකි. | وَاِنَّهٗ لَتَذۡكِرَةٌ لِّلۡمُتَّقِيۡنَ ﴿٤٩﴾ |
| 50. තවද නුඹලා අතරින් (මෙය) ප්‍රතික්ෂේප කරන්නන්ද සිටින බව අපි දනිමු. | وَاِنَّا لَنَعۡلَمُ اَنَّ مِنۡكُمۡ مُّكَذِّبِيۡنَ ﴿٥٠﴾ |
| 51. තවද ඇත්තෙන්ම මෙය අවිශ්වාසිතයින් හට කණගාටුවට (හේතුවක්) වනු ඇත. | وَاِنَّهٗ لَحَسۡرَةٌ عَلَى الۡكٰفِرِيۡنَ ﴿٥١﴾ |
| 52. තවද ඇත්තෙන්ම මෙය ඒකාන්ත සත්‍යයකි. | وَاِنَّهٗ لَحَقُّ الۡيَقِيۡنِ ﴿٥٢﴾ |
| 53. එබැවින් අතිමහත් වූ ඔබගේ අධිපතියාණන්ගේ නාමය සුවිශුද්ධ කරන්න. | فَسَبِّحۡ بِاسۡمِ رَبِّكَ الۡعَظِيۡمِ ﴿٥٣﴾ |




## අල් මආරිජ්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ﴿١﴾

2. සිදුවන්නාවූ දඬුවමක් ගැන විමසන්නෙක් විමසුවේය.

سَأَلَ سَآئِلُۢ بِعَذَابٖ وَاقِعٖ ﴿٢﴾

3. අවිශ්වාසිතයින්ට එය වළක්වන්නෙක් නැත.

لِّلۡكَٰفِرِينَ لَيۡسَ لَهُۥ دَافِعٞ ﴿٣﴾

4. (එය) අති උත්තමයාණන් වන අල්ලාහ් වෙතිනි.

مِّنَ ٱللَّهِ ذِي ٱلۡمَعَارِجِ ﴿٤﴾

5. සුරදූතයින්ද ආත්මයද එක් දිනයකදී ඔහු කරා ආරෝහණය වනු ඇත. එහි (එම දිනයෙහි) කාල පරාසය වසර පනස් දහසකි.

تَعۡرُجُ ٱلۡمَلَٰٓئِكَةُ وَٱلرُّوحُ إِلَيۡهِ فِي يَوۡمٖ كَانَ مِقۡدَارُهُۥ خَمۡسِينَ أَلۡفَ سَنَةٖ ﴿٥﴾

6. එබැවින් ප්‍රශංසනීය ඉවසිල්ලෙන් යුතුව ඉවසිලිමත් වන්න.

فَٱصۡبِرۡ صَبۡرٗا جَمِيلًا ﴿٦﴾

7. නියතවශයෙන්ම ඔවුහු එය දුරස්ථව දකින්නෝය.

إِنَّهُمۡ يَرَوۡنَهُۥ بَعِيدٗا ﴿٧﴾

8. නමුත් අපි එය සමීපව දකින්නෙමු.

وَنَرَىٰهُ قَرِيبٗا ﴿٨﴾

9. අහස උණුවූ තඹ මෙන් වන්නාවූ එදින.

يَوۡمَ تَكُونُ ٱلسَّمَآءُ كَٱلۡمُهۡلِ ﴿٩﴾

10. තවද කඳුවැටි ලොම් කැබලි මෙන් වනු ඇත.

وَتَكُونُ ٱلۡجِبَالُ كَٱلۡعِهۡنِ ﴿١٠﴾

11. තවද හිතවතෙක් තවත් හිතවතෙකු ගැන නොවිමසන්නේය.

وَلَا يَسۡـَٔلُ حَمِيمٌ حَمِيمٗا ﴿١١﴾

12. ඔවුන් එකිනෙකාව දැකගන්නට සලස්වනු ලබන්නේය. තවද වරදකරුවා එදින දඬුවමින් (මිදෙන්නට) ඔහුගේ දරුවන්ව වන්දි වශයෙන් දීමට පෙළඹෙනු ඇත.

يُبَصَّرُونَهُمۡ يَوَدُّ ٱلۡمُجۡرِمُ لَوۡ يَفۡتَدِي مِنۡ عَذَابِ يَوۡمِئِذِۭ بِبَنِيهِ ﴿١٢﴾

وَصَاحِبَتِهِ وَأَخِيهِ ﴿١٣﴾

13. තවද ඔහුගේ බිරිඳවත් ඔහුගේ සහෝදරයාවත්,

وَفَصِيلَتِهِ الَّتِي تُؤْوِيهِ ﴿١٤﴾

14. තවද ඔහුට රැකවරණය දුන් ඔහුගේ ගෝත්‍රිකයින්වත්,

وَمَنْ فِي الْأَرْضِ جَمِيعًا ثُمَّ يُنْجِيهِ ﴿١٥﴾

15. තවද පොළොවෙහි සිටින (සියළු) අයවත් ඔහු තමාව මුදා ගැනීම පිණිස (බිලි දිය හැකිවේ) නම් (යැයි සිතන්නේය).

كَلَّا ۖ إِنَّهَا لَظَىٰ ﴿١٦﴾

16. නමුත් නොඑසේය! නියතවශයෙන්ම එය ගිනි ජාලාවකි.

نَزَّاعَةً لِلشَّوَىٰ ﴿١٧﴾

17. (ශරීරයෙහි) අගිස්ස තෙක් සම ගලවා දමන්නක්ය.

تَدْعُو مَنْ أَدْبَرَ وَتَوَلَّىٰ ﴿١٨﴾

18. තම පිටුපස හරවා පැන දුවන අයව එය කැඳවන්නේය.

وَجَمَعَ فَأَوْعَىٰ ﴿١٩﴾

19. තවද (වස්තූන්) රැස්කොට (එය)නොදී වළකින අයවද.

إِنَّ الْإِنْسَانَ خُلِقَ هَلُوعًا ﴿٢٠﴾

20. සැබැවින්ම මිනිසා නොඉවසිලිවන්තව සහ මසුරුකමින් උපත ලද්දෙකි.

إِذَا مَسَّهُ الشَّرُّ جَزُوعًا ﴿٢١﴾

21. ඔහුට නපුරක් අත් වූ විට ඔහු වැළපෙන්නේය.

وَإِذَا مَسَّهُ الْخَيْرُ مَنُوعًا ﴿٢٢﴾

22. නමුත් ඔහුට යහපතක් අත්වූ විට ඔහු ලෝභ වන්නේය.

إِلَّا الْمُصَلِّينَ ﴿٢٣﴾

23. නැමදුම් කරන්නන් හැරෙන්නටය.

الَّذِينَ هُمْ عَلَىٰ صَلَاتِهِمْ دَائِمُونَ ﴿٢٤﴾

24. ඔවුන් තමන්ගේ නැමදුමෙහි නිරන්තරයෙන්ම නියැළී සිටින්නන්ය.

وَالَّذِينَ فِي أَمْوَالِهِمْ حَقٌّ مَعْلُومٌ ﴿٢٥﴾

25. තවද ඔවුන්ගේ වස්තූන්හි නියම කරන ලද කොටසක් ඇත.

لِلسَّائِلِ وَالْمَحْرُومِ ﴿٢٦﴾

26. ඉල්ලන අයහටද නොඉල්ලන අසරණවූ අයහටද.

وَالَّذِينَ يُصَدِّقُونَ بِيَوْمِ الدِّينِ ﴿٢٧﴾

27. තවද ඔවුන් විනිශ්චය දිනය සත්‍යය යැයි තහවුරු කරන්නන්ය.

وَالَّذِينَ هُمْ مِّنْ عَذَابِ رَبِّهِمْ مُّشْفِقُونَ ٢٨

28. තවද ඔවුන් තමන්ගේ අධිපතියාණන්ගේ දඬුවමට බිය දක්වන්නන්ය.

إِنَّ عَذَابَ رَبِّهِمْ غَيْرُ مَأْمُونٍ ٢٩

29. සැබැවින්ම ඔවුන්ගේ අධිපතියාණන්ගේ දඬුවමට එරෙහිව කිසිම රැකවරණයක් නැත.

وَالَّذِينَ هُمْ لِفُرُوجِهِمْ حَافِظُونَ ٣٠

30. තවද ඔවුන් තමන්ගේ රහස් අවයවයන් ආරක්ෂා කරන්නන්ය.

إِلَّا عَلَىٰ أَزْوَاجِهِمْ أَوْ مَا مَلَكَتْ أَيْمَانُهُمْ فَإِنَّهُمْ غَيْرُ مَلُومِينَ ٣١

31. ඔවුන්ගේ බිරිඳන්ගෙන් හෝ ඔවුන්ගේ දකුණත් හිමි කරගත් අය(ගෙන්) හෝ හැරෙන්නටය. ඇත්තෙන්ම එවැන්නන් දොස් පවරනු නොලබන්නන්ය.

فَمَنِ ابْتَغَىٰ وَرَاءَ ذَٰلِكَ فَأُولَٰئِكَ هُمُ الْعَادُونَ ٣٢

32. නමුත් කවුරුන් හෝ මෙයින් ඔබ්බට පතන්නේ නම් ඔවුන්ම සීමාව ඉක්මවන්නන්ය.

وَالَّذِينَ هُمْ لِأَمَانَاتِهِمْ وَعَهْدِهِمْ رَاعُونَ ٣٣

33. තවද ඔවුන් විශ්වාසය පිට පවරා ඇති තම භාරයන් සහ ඔවුන්ගේ ගිවිසුම් ගැන පරීක්ෂාකාරී වන්නන්ය.

وَالَّذِينَ هُمْ بِشَهَادَاتِهِمْ قَائِمُونَ ٣٤

34. තවද ඔවුන් තමන්ගේ සාක්ෂීන් කෙරෙහි යුක්තිගරුකව නිරත වන්නන්ය.

وَالَّذِينَ هُمْ عَلَىٰ صَلَاتِهِمْ يُحَافِظُونَ ٣٥

35. තවද ඔවුන් තමන්ගේ නැමදුම ස්ථාවරව රකින්නන්ය.

أُولَٰئِكَ فِي جَنَّاتٍ مُّكْرَمُونَ ٣٦

36. ස්වර්ගයෙහි ගරුත්වයට පත් කරනු ලබන්නන් මොවුන්මය.

فَمَالِ الَّذِينَ كَفَرُوا قِبَلَكَ مُهْطِعِينَ ٣٧

37. නමුත් අවිශ්වාසීතයින්ට කුමක් සිදුවී ඇත්තේද? ඔවුන් ඔබ කරා කෝපයට පත්ව දිව එන්නෝය.

عَنِ الْيَمِينِ وَعَنِ الشِّمَالِ عِزِينَ ٣٨

38. දකුණු පැත්තෙන් සහ වම් පැත්තෙන් විවිධ පිරිස් වශයෙන්ද?

اَيَطْمَعُ كُلُّ امْرِئٍ مِّنْهُمْ اَنْ يُّدْخَلَ جَنَّةَ نَعِيْمٍ ۙ﴿٣٩﴾

39. ඔවුනතරින් සෑම මිනිසෙක්ම දිව්‍යසැපතින් යුත් ස්වර්ගයට ඇතුළු කරවනු ලබන්නේයැයි බලාපොරොත්තු වන්නේද?

كَلَّا ؕ اِنَّا خَلَقْنٰهُمْ مِّمَّا يَعْلَمُوْنَ ﴿٤٠﴾

40. කිසිසේත් නොව! ඔවුන් දන්නා දෙයින් අපි ඔවුන්ව මවා ඇත්තෙමු.

فَلَآ اُقْسِمُ بِرَبِّ الْمَشٰرِقِ وَالْمَغٰرِبِ اِنَّا لَقٰدِرُوْنَ ۙ﴿٤١﴾

41. නමුත් අවධාරණයයි! නැගෙනහිරයන්හි සහ බස්නාහිරයන්හි අධිපතියාණන්ගේ නාමයෙන් මම දිවුරමි. නියතවශයෙන්ම අපි බලවත් වෙමු.

عَلٰٓى اَنْ نُّبَدِّلَ خَيْرًا مِّنْهُمْ ۙ وَمَا نَحْنُ بِمَسْبُوْقِيْنَ ﴿٤٢﴾

42. ඔවුන් වෙනුවට ඔවුන්ට වඩා හොඳ අයව ගෙන ඒමට (අපි බලවත් වෙමු). තවද (අපගේ සැලසුමෙහි) අපි පරාජවන්නන් නොවෙමු.

فَذَرْهُمْ يَخُوْضُوْا وَيَلْعَبُوْا حَتّٰى يُلٰقُوْا يَوْمَهُمُ الَّذِيْ يُوْعَدُوْنَ ۙ﴿٤٣﴾

43. එබැවින් ඔවුන්ට පොරොන්දු දෙනු ලැබූ ඔවුන්ගේ එම දිනය ඔවුන් හමුවන තුරු විකාර බස්හි නියැලීමටද කෙළි සෙල්ලමෙහි යෙදීමටද ඔවුන්ව නිදැල්ලේ ඉඩ හරින්න.

يَوْمَ يَخْرُجُوْنَ مِنَ الْاَجْدَاثِ سِرَاعًا كَاَنَّهُمْ اِلٰى نُصُبٍ يُّوْفِضُوْنَ ۙ﴿٤٤﴾

44. එදින ඔවුන් තමන්ගේ ඉලක්කයන් කරා දිව යන්නාක් මෙන් තමන්ගේ සොහොන්වලින් නික්ම යන්නෝය.

خَاشِعَةً اَبْصَارُهُمْ تَرْهَقُهُمْ ذِلَّةٌ ؕ ذٰلِكَ الْيَوْمُ الَّذِيْ كَانُوْا يُوْعَدُوْنَ ﴿٤٥﴾

45. ඔවුන්ගේ බැල්ම පහතට හෙළෙනු ඇත. තවද ඔවුන්ව අවමානය වෙළා ගනු ඇත. මෙයම ඔවුනට පොරොන්දු දෙනු ලැබූ දිනය වන්නේය.



## නූහ්

(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝١

1. මහා කාරුණික වූද, පරම දයාබර වූද, අල්ලාහ්ගේ නාමයෙන්.

اِنَّاۤ اَرْسَلْنَا نُوْحًا اِلٰى قَوْمِهٖۤ اَنْ اَنْذِرْ قَوْمَكَ مِنْ قَبْلِ اَنْ يَّاْتِيَهُمْ عَذَابٌ اَلِيْمٌ ۝٢

2. නියතවශයෙන්ම අපි නූහ්ව ඔහුගේ ජනතාව වෙත, 'ඔබ ඔබගේ ජනතාවට, වේදනීය දඬුවමක් ඔවුනට පැමිණෙන්නට පෙර අවවාද කරන්නැ'යි (පවසමින්) යැව්වෙමු.

قَالَ يٰقَوْمِ اِنِّىْ لَكُمْ نَذِيْرٌ مُّبِيْنٌ ۙ۝٣

3. ඔහු (මෙසේ) කීවේය, 'එම්බල මාගේ ජනතාවනි! නියතවශයෙන්ම මම නුඹලා වෙත පැහැදිලි අවවාද කරුවෙක් වෙමි'.

اَنِ اعْبُدُوا اللّٰهَ وَاتَّقُوْهُ وَاَطِيْعُوْنِ ۙ۝٤

4. එනම්, 'නුඹලා අල්ලාහ් නමදිනු. තවද ඔහුට බියබැතිමත් වනු. තවද මා හට අවනත වනු'.

يَغْفِرْ لَكُمْ مِّنْ ذُنُوْبِكُمْ وَيُؤَخِّرْكُمْ اِلٰۤى اَجَلٍ مُّسَمًّى ؕ اِنَّ اَجَلَ اللّٰهِ اِذَا جَآءَ لَا يُؤَخَّرُ ۘ لَوْ كُنْتُمْ تَعْلَمُوْنَ ۝٥

5. 'ඔහු නුඹලාගේ පව්වලට නුඹලාට සමාව දෙන්නේය. තවද නියමිත කාලය තෙක් නුඹලාට කාල අවකාශය ලබා දෙන්නේය. සැබැවින්ම අල්ලාහ්ගෙන් නියමිත වූ කාලය පැමිණෙන විට එය කල් දමනු නොලැබේ. නුඹලා (එය) දැන සිටියා නම්!'

قَالَ رَبِّ اِنِّىْ دَعَوْتُ قَوْمِىْ لَيْلًا وَّنَهَارًا ۙ۝٦

6. ඔහු (මෙසේද) පැවසුවේය, "මාගේ අධිපතියාණෙනි! මම මාගේ ජනතාව රෑ දහවල්හි කැඳෙව්වෙමි".

فَلَمْ يَزِدْهُمْ دُعَآءِىْۤ اِلَّا فِرَارًا ۝٧

7. "එවිට මාගේ කැඳවීම, ඔවුනට පලායෑමට තුඩු දීමක් මිස අන්දෙයක් නොවීය."

وَاِنِّىْ كُلَّمَا دَعَوْتُهُمْ لِتَغْفِرَ لَهُمْ جَعَلُوْۤا اَصَابِعَهُمْ فِىْۤ اٰذَانِهِمْ وَاسْتَغْشَوْا

8. "තවද ඔබ ඔවුනට සමාව දෙනු පිණිස මා ඔවුන් කැඳවූ සෑමවිටම ඔවුන් තම ඇඟිලි ඔවුන්ගේ කන්හි

ثِيَابَهُمْ وَاَصَرُّوْا وَاسْتَكْبَرُوا اسْتِكْبَارًا ۚ﴿٨﴾

ඔබා ගත්හ. තවද තම වස්ත්‍ර වලින් තමන් වටා ඔතා ගත්හ. තවද (තමන්ගේ දුෂ්ටකමෙහි) නියැලී සිටියහ. තවද මුරණ්ඩු වී දැඩි අහංකාරව හැසිරුණහ".

ثُمَّ اِنِّيْ دَعَوْتُهُمْ جِهَارًا ۙ﴿٩﴾

9. "පසුව මම ඔවුන්ව (ඔබගේ මාර්ගය වෙතට) විවෘතව කැඳවූයෙමි".

ثُمَّ اِنِّيْٓ اَعْلَنْتُ لَهُمْ وَاَسْرَرْتُ لَهُمْ اِسْرَارًا ۙ﴿١٠﴾

10. "පසුව මා ඔවුනට ප්‍රසිද්ධව දැනුම් දුන්නෙමි. තවද ඔවුනට පුද්ගලිකව කතා කළෙමි".

فَقُلْتُ اسْتَغْفِرُوْا رَبَّكُمْ ؕ اِنَّهٗ كَانَ غَفَّارًا ۙ﴿١١﴾

11. "තවද 'නුඹලාගේ අධිපතියාණන්ගෙන් ක්ෂමාව අයැදිනු. මන්ද ඔහු ඉතා බෙහෙවින් ක්ෂමාශීලියැ'යි මම පැවසුවෙමි".

يُّرْسِلِ السَّمَآءَ عَلَيْكُمْ مِّدْرَارًا ۙ﴿١٢﴾

12. 'ඔහු නුඹලා කෙරෙහි බහුලව වැසි පහළ කරන්නේය'.

وَّيُمْدِدْكُمْ بِاَمْوَالٍ وَّبَنِيْنَ وَيَجْعَلْ لَّكُمْ جَنّٰتٍ وَّيَجْعَلْ لَّكُمْ اَنْهٰرًا ؕ﴿١٣﴾

13. 'තවද ඔහු නුඹලාට වස්තුන් මගින්ද දරුවන් (මගින්)ද උදව් කරන්නේය. තවද ඔහු නුඹලාට උද්‍යානයන් සලස්වා දෙන්නේය. තවද ඔහු නුඹලාට ගංගාවන් සලස්වා දෙන්නේය'.

مَا لَكُمْ لَا تَرْجُوْنَ لِلّٰهِ وَقَارًا ۚ﴿١٤﴾

14. 'නුඹලා අල්ලාහ්ට සැබෑ ගරුත්වය නොපිරිනමන්නට නුඹලාට සිදුවී ඇත්තේ කුමක්ද?'

وَقَدْ خَلَقَكُمْ اَطْوَارًا ﴿١٥﴾

15. 'තවද නිශ්චිතවම ඔහු නුඹලාව විවිධ අවධියන්හි මවා ඇත්තේය'.

اَلَمْ تَرَوْا كَيْفَ خَلَقَ اللّٰهُ سَبْعَ سَمٰوٰتٍ طِبَاقًا ۙ﴿١٦﴾

16. 'අල්ලාහ් අහස් සත කෙසේ එකක් මත එකක් තිබෙන සේ මවා ඇත්තේ දැයි නුඹලා සිතා නොබැලුවෙහුද?'

وَّجَعَلَ الْقَمَرَ فِيْهِنَّ نُوْرًا وَّجَعَلَ الشَّمْسَ سِرَاجًا ﴿١٧﴾

17. 'තවද (ඔහු) සඳ එහි ආලෝකයක් ලෙස කළේය. තවද හිරු පහනක් ලෙසද කළේය'.

وَاللّٰهُ اَنْۢبَتَكُمْ مِّنَ الْاَرْضِ نَبَاتًا ۙ﴿۱۸﴾

18. 'තවද ගස්වැල් වැඩෙන්නාක් මෙන් අල්ලාහ් නුඹලාව පොළොවෙන් වැඩෙන්නට සැළැස්වූවේය'.

ثُمَّ يُعِيْدُكُمْ فِيْهَا وَيُخْرِجُكُمْ اِخْرَاجًا ﴿۱۹﴾

19. 'පසුව ඔහු නුඹලාව එහි ආපසු යැමට සලස්වන්නේය. තවද ඔහු නුඹලාව (විශේෂ ආකාරයෙන් එයින්) පිටතට ගෙන එන්නේය'.

وَاللّٰهُ جَعَلَ لَكُمُ الْاَرْضَ بِسَاطًا ۙ﴿۲۰﴾

20. 'තවද අල්ලාහ් පොළොව නුඹලාට පුළුල් වූ විශාල ප්‍රදේශයක් කර ඇත්තේය'.

لِّتَسْلُكُوْا مِنْهَا سُبُلًا فِجَاجًا ﴿۲۱﴾

21. 'එය නුඹලා එහි විවෘත මාර්ගයන්හි ගමන් කරනු පිණිසය'.

قَالَ نُوْحٌ رَّبِّ اِنَّهُمْ عَصَوْنِيْ وَاتَّبَعُوْا مَنْ لَّمْ يَزِدْهُ مَالُهٗ وَوَلَدُهٗۤ اِلَّا خَسَارًا ۚ﴿۲۲﴾

22. නූහ් (මෙසේ) පැවසුවේය. "මාගේ අධිපතියාණෙනි! ඔවුන් මාහට අකීකරු වූහ. ඔවුන් අනුගමනය කළ තැනැත්තා ගත්කල ඔහු තම වස්තුව සහ දරුවන් විසින් අධික ලෙස විනාශයට පත් වූ කෙනෙකි."

وَمَكَرُوْا مَكْرًا كُبَّارًا ۚ﴿۲۳﴾

23. "තවද ඔවුන් බලවත් කුමන්ත්‍රණයක් සැලසුම් කර ඇත."

وَقَالُوْا لَا تَذَرُنَّ اٰلِهَتَكُمْ وَلَا تَذَرُنَّ وَدًّا وَّلَا سُوَاعًا ۙ وَّلَا يَغُوْثَ وَيَعُوْقَ وَنَسْرًا ۚ﴿۲۴﴾

24. "තවද ඔවුන් (එකිනෙකාට), 'නුඹලා (කිසිදු අවස්ථාවක) නුඹලාගේ දෙවිවරුන්ව අත් නොහරිනු. එමෙන්ම වද් වද◆ අත් නොහරිනු. සුවා වද◆ නොව. යගූස් වද◆ යඌක් වද◆ නසර් වද◆ නොව' යැයි පැවසූහ."

وَقَدْ اَضَلُّوْا كَثِيْرًا ۚ وَلَا تَزِدِ الظّٰلِمِيْنَ اِلَّا ضَلٰلًا ﴿۲۵﴾

25. "තවද ඔවුන් බොහෝ අයව නොමගට යැවූහ. එබැවින් ඔබ වැරදි කරුවන්ව නොමගෙහි මිස වර්ධනය නොකරන්වා".

مِمَّا خَطِيْٓـٰٔتِهِمْ اُغْرِقُوْا فَاُدْخِلُوْا نَارًا ۙ فَلَمْ يَجِدُوْا لَهُمْ مِّنْ دُوْنِ اللّٰهِ اَنْصَارًا ﴿۲۶﴾

26. ඔවුන්ගේ පාපයන් හේතු කොටගෙන ඔවුන් ගිල්වනු ලැබූහ. තවද ගින්නටද ඇතුළු වීමටද සලස්වනු ලැබූහ. තවද අල්ලාහ්ට එරෙහිව තමන්ට උදව්කරුවන් කිසිවෙක් ඔවුන් නොදුටුවෝය.

◆ අරාබිවරුන්ගේ මිථ්‍යා පිළිමයන්.

27. තවද නූහ් (මෙසේ) කීවේය, 'මාගේ අධිපතියාණෙනි! මෙම භූමියෙහි අවිශ්වාසීතයින්ගෙන් කිසිවෙකුටත් පිවත්වීමට ඉඩ නොහරිනු මැනව'.

وَقَالَ نُوحٌ رَّبِّ لَا تَذَرْ عَلَى الْأَرْضِ مِنَ الْكٰفِرِيْنَ دَيَّارًا ﴿٢٧﴾

28. 'මන්දයත් ඔබ ඔවුන්ව අත්හැරියේ නම්, ඔවුන් ඔබගේ දාසයින්ව නොමග යවන්නෝය. තවද ඔවුන් ජනිත කරන්නේ පව්කාරයෙකු සහ අවිශ්වාසීතයෙකු මිස නැත'.

اِنَّكَ اِنْ تَذَرْهُمْ يُضِلُّوْا عِبَادَكَ وَلَا يَلِدُوْٓا اِلَّا فَاجِرًا كَفَّارًا ﴿٢٨﴾

29. 'මාගේ අධිපතියාණෙනි! මා හටද මාගේ දෙමාපියන් හටද විශ්වාසීතව මාගේ නිවසට ඇතුළු වන අයටද විශ්වාසීත පුරුෂයින්ටද විශ්වාසීත ස්ත්‍රීන්ටද ක්ෂමාව දෙනු මැනව. එමෙන්ම ඔබ වැරදිකරන්නන්ට විනාශය මිස අන්දෙයක් වර්ධනය නොකරනු මැනව'.

رَبِّ اغْفِرْ لِيْ وَلِوَالِدَيَّ وَلِمَنْ دَخَلَ بَيْتِيَ مُؤْمِنًا وَّلِلْمُؤْمِنِيْنَ وَالْمُؤْمِنٰتِ ۗ وَلَا تَزِدِ الظّٰلِمِيْنَ اِلَّا تَبَارًا ﴿٢٩﴾



අල් ජින්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

قُلۡ اُوۡحِىَ اِلَىَّ اَنَّهُ اسۡتَمَعَ نَفَرٌ مِّنَ الۡجِنِّ فَقَالُوۡۤا اِنَّا سَمِعۡنَا قُرۡاٰنًا عَجَبًا ۝٢

2. පවසන්න, "ජින්වරුන්ගෙන් සමූහයක් සවන් දුන්නේයැයි මා හට අනාවරණය කරන ලදී. තවද ඔවුහු, 'සත්‍යයෙන්ම අපි චමත්කාරවත් කුර්ආනයට සවන් දී ඇත්තෙමු'යි පැවසූහ.

يَّهۡدِىۡۤ اِلَى الرُّشۡدِ فَاٰمَنَّا بِهٖ ؕ وَلَنۡ نُّشۡرِكَ بِرَبِّنَاۤ اَحَدًا ۝٣

3. 'එය නිවැරදි මාර්ගය වෙතට මග පෙන්වයි. එබැවින් අපි ඒ කෙරෙහි විශ්වාස කොට ඇත්තෙමු. තවද අපගේ අධිපතියාණන්ට අපි කිසිවක් කිසිසේත් සමාන නොතබන්නෙමු'.

وَّاَنَّهٗ تَعٰلٰى جَدُّ رَبِّنَا مَا اتَّخَذَ صَاحِبَةً وَّلَا وَلَدًا ۝٤

4. 'තවද සැබැවින්ම අපගේ අධිපතියාණන්ගේ මහානුභාවය අති උසස්(යැයි අපි විශ්වාස කරන්නෙමු). තවද ඔහු තමාට බිරිඳකු හෝ පුතෙකු හෝ ගෙන නොමැත්තේය'.

وَّاَنَّهٗ كَانَ يَقُوۡلُ سَفِيۡهُنَا عَلَى اللّٰهِ شَطَطًا ۝٥

5. 'තවද සැබැවින්ම අප අතර මෝඩ අය අල්ලාහ් පිළිබඳව පමණ ඉක්මවා බොරු ගොතමින් සිටියහ.'

وَّاَنَّا ظَنَنَّاۤ اَنۡ لَّنۡ تَقُوۡلَ الۡاِنۡسُ وَالۡجِنُّ عَلَى اللّٰهِ كَذِبًا ۝٦

6. 'තවද මිනිසුන් සහ ජින්වරුන් කිසිවිටෙකත් අල්ලාහ් පිළිබඳව බොරුවක් නොපවසනු ඇතැයි අපි සිතුවෙමු'.

وَّاَنَّهٗ كَانَ رِجَالٌ مِّنَ الۡاِنۡسِ يَعُوۡذُوۡنَ بِرِجَالٍ مِّنَ الۡجِنِّ فَزَادُوۡهُمۡ رَهَقًا ۝٧

7. 'තවද ඇත්තෙන්ම පොදු ජනයාගෙන් සමහර මිනිසුන් ජින්වරුන්ගේ සමහර මින්සුන්ගෙන් රැකවරණය පතමින් සිටියහ. තවද (මෙයාකාරයට) ඔවුන් මොවුන්ගේ (ජින්වරුන්ගේ) උඩඟුකම වැඩි කළෝය'.

وَّاَنَّهُمۡ ظَنُّوۡا كَمَا ظَنَنۡتُمۡ اَنۡ لَّنۡ يَّبۡعَثَ

8. 'තවද නුඹලා සිතන පරිදි අල්ලාහ් (දූතයින්) කිසිවෙක්ව කිසිවිටෙකත්

اللّٰهُ اَحَدًا ۙ ﴿٨﴾

නොයවන්නේ යැයි ඇත්තෙන්ම ඔවුහුද සිතූහ'.

وَّاَنَّا لَمَسْنَا السَّمَآءَ فَوَجَدْنٰهَا مُلِئَتْ حَرَسًا شَدِيْدًا وَّشُهُبًا ۙ ﴿٩﴾

9. 'තවද අපි නියතවශයෙන්ම අහස විපරම් කර බැලුවෙමු. නමුත් අපි එය දැඩි මුරකාවල් සහ උල්කාපාත වලින් පිරී තිබෙනු දුටුවෙමු'.

وَّاَنَّا كُنَّا نَقْعُدُ مِنْهَا مَقَاعِدَ لِلسَّمْعِ ؕ فَمَنْ يَّسْتَمِعِ الْاٰنَ يَجِدْ لَهٗ شِهَابًا رَّصَدًا ۙ ﴿١٠﴾

10. 'තවද අප සවන් දෙනු පිණිස එහි සමහර ආසනයන්හි අසුන්ගනිමින් සිටියෙමු. නමුත් කවුරුන් හෝ දැන් සවන් දෙන්නේද ඔහුට සැඟවී පහරදීමට උල්කාපාතයක් ඇතිබව ඔහු දැක ගන්නේය'.

وَّاَنَّا لَا نَدْرِيْۤ اَشَرٌّ اُرِيْدَ بِمَنْ فِى الْاَرْضِ اَمْ اَرَادَ بِهِمْ رَبُّهُمْ رَشَدًا ۙ ﴿١١﴾

11. 'තවද පොළොවෙහි සිටින අයහට නපුරක් අදහස් කරන ලද්දේද නැතහොත් ඔවුන්ගේ අධිපතියාණන් ඔවුනට (ඇතැම්) යහපතක් අදහස් කරන්නේදැයි අපි නොදනිමු'.

وَّاَنَّا مِنَّا الصّٰلِحُوْنَ وَمِنَّا دُوْنَ ذٰلِكَ ؕ كُنَّا طَرَآئِقَ قِدَدًا ۙ ﴿١٢﴾

12. 'තවද අපගෙන් සමහරුන් ධාර්මිෂ්ඨකයින්ය. එමෙන්ම අපගෙන් තවත් සමහරුන් එසේ නොවන්නන්ය. තවද අපි වෙනස් මත දරණ පිරිස් වෙමු'.

وَّاَنَّا ظَنَنَّاۤ اَنْ لَّنْ نُّعْجِزَ اللّٰهَ فِى الْاَرْضِ وَلَنْ نُّعْجِزَهٗ هَرَبًا ۙ ﴿١٣﴾

13. 'තවද අපට පොළෙවෙහි අල්ලාහ්(ගේ සැලැස්ම) නිෂ්ඵල කරන්නට නොහැකි බවද පැන යැමෙන්ද අපට ඔහුගෙන් බේරීමට නොහැකි බවද අපි දනිමු'.

وَّاَنَّا لَمَّا سَمِعْنَا الْهُدٰۤى اٰمَنَّا بِهٖ ؕ فَمَنْ يُّؤْمِنْۢ بِرَبِّهٖ فَلَا يَخَافُ بَخْسًا وَّلَا رَهَقًا ۙ ﴿١٤﴾

14. 'තවද අප යහ මගට සවන් දුන් කල්හි අපි එය විශ්වාස කළෙමු. තවද කවුරුන් හෝ තම අධිපතියාණන් කෙරෙහි විශ්වාස කරන්නේද ඔහු පාඩුවක් හෝ අසාධාරණයක් හෝ පිළිබඳව බිය නොවන්නේය'.

وَّاَنَّا مِنَّا الْمُسْلِمُوْنَ وَمِنَّا الْقٰسِطُوْنَ ؕ فَمَنْ اَسْلَمَ فَاُولٰٓئِكَ تَحَرَّوْا رَشَدًا ﴿١٥﴾

15. 'තවද අපගෙන් සමහරු (දෙවියන්ට) යටහත් වූවන් වන අතර අපගෙන් සමහරු (නිවැරදි මාර්ගයෙන්) බැහැරවූවන්යැ'"(යිද පැවසූහ). තවද යමෙක් (දෙවියන්ට) යටහත් වන්නේද ඔවුන්ම නිවැරදි මාර්ගය සොයන්නන්ය.

16. තවද (නිවැරදි මාර්ගයෙන්) බැහැරවන්නන් ගත්කල ඔවුන් නිරයේ ඉන්ධන බවට පත්වන්නන්ය.

وَاَمَّا الْقٰسِطُوْنَ فَكَانُوْا لِجَهَنَّمَ حَطَبًا ﴿١٦﴾

17. තවද ඔවුන් (නිවැරදි) මාර්ගයෙහි ස්ථාවරව සිටියේ නම් අපි නිශ්චිතවම ඔවුනට පානය සඳහා බහුලව ජලය සපයා දෙන්නෙමු.

وَّاَنْ لَّوِ اسْتَقَامُوْا عَلَى الطَّرِيْقَةِ لَاَسْقَيْنٰهُمْ مَّآءً غَدَقًا ﴿١٧﴾

18. අපි ඔවුන්ව එමගින් පිරික්සනු පිණිසය. තවද කවුරුන් හෝ තම අධිපතියාණන්ව සිහිකිරීමෙන් පිටුපා යන්නේද ඔහුව සහමුලින්ම යටපත් කරන්නාවූ දඬුවමෙහි ඔහු හෙළන්නේය.

لِّنَفْتِنَهُمْ فِيْهِ ۚ وَمَنْ يُّعْرِضْ عَنْ ذِكْرِ رَبِّهٖ يَسْلُكْهُ عَذَابًا صَعَدًا ﴿١٨﴾

19. තවද (සියළුම) නැමදුම් ස්ථාන අල්ලාහ්ට අයත්ය. එබැවින් අල්ලාහ් හැර අන් කිසිවෙකුව නොකැඳවනු.

وَّاَنَّ الْمَسٰجِدَ لِلّٰهِ فَلَا تَدْعُوْا مَعَ اللّٰهِ اَحَدًا ﴿١٩﴾

20. තවද අල්ලාහ්ගේ දාසයා ඔහුව අයැදිමින් නැගිට සිටින සෑමවිටම ඔවුන් ඔහුව(දාසයාව) ඉතා සමීපව වට කරමින් තෙරපෙන්නෝය.

وَّاَنَّهٗ لَمَّا قَامَ عَبْدُ اللّٰهِ يَدْعُوْهُ كَادُوْا يَكُوْنُوْنَ عَلَيْهِ لِبَدًا ﴿٢٠﴾

21. පවසන්න, 'මාගේ අධිපතියාණන්ට පමණක් මම අයැදින්නෙමි. තවද මම ඔහුට කිසිවක් සමාන නොතබන්නෙමි'.

قُلْ اِنَّمَآ اَدْعُوْا رَبِّيْ وَلَآ اُشْرِكُ بِهٖٓ اَحَدًا ﴿٢١﴾

22. පවසන්න, 'නුඹලාට කිසියම් හානියක් හෝ යහපතක් හෝ කරන්නට මා හට බලයක් නොමැත'.

قُلْ اِنِّيْ لَآ اَمْلِكُ لَكُمْ ضَرًّا وَّلَا رَشَدًا ﴿٢٢﴾

23. පවසන්න, 'නියතවශයෙන්ම අල්ලාහ්ට එරෙහිව මා හට රැකවරණය දෙන්නට කිසිවෙක් නැත. එමෙන්ම ඔහු හැර කිසිදු පිළිසරණක් මා නොදකින්නෙමි.'

قُلْ اِنِّيْ لَنْ يُّجِيْرَنِيْ مِنَ اللّٰهِ اَحَدٌ ۙ وَّلَنْ اَجِدَ مِنْ دُوْنِهٖ مُلْتَحَدًا ﴿٢٣﴾

24. '(මාගේ වගකීම වනුයේ) අල්ලාහ්ගෙන් (වන අනාවරණය) සහ ඔහුගේ පණිවිඩය දන්වා සිටීම පමණි.

اِلَّا بَلٰغًا مِّنَ اللّٰهِ وَرِسٰلٰتِهٖ ۚ وَمَنْ يَّعْصِ اللّٰهَ وَرَسُوْلَهٗ فَاِنَّ لَهٗ نَارَ جَهَنَّمَ خٰلِدِيْنَ

فِيهَآ أَبَدًا ﴿٢٤﴾

තවද අල්ලාහ් සහ ඔහුගේ දූතයාණන්ට අකීකරු වන අයහට නිරා ගින්නය. එහි ඔවුන් ඉතා දිගු කල් වෙසෙන්නන්ය'.

حَتَّىٰٓ إِذَا رَأَوْا۟ مَا يُوعَدُونَ فَسَيَعْلَمُونَ مَنْ أَضْعَفُ نَاصِرًا وَأَقَلُّ عَدَدًا ﴿٢٥﴾

25. ඔවුන්ට පොරොන්දු වන ලද දේ ඔවුන් දකින තෙක් (ඔවුන් නිරතුරුවම අවිශ්වාස කරනු ඇත.) තවද උදව් කරුවන් අතින් වඩාත් දුර්වල කවුරුන්ද යන්නත් ගණනය අතින් වඩාත් ස්වල්ප කවුරුන්ද යන්නත් ඔවුන් විගසින්ම දැනගන්නෝය.

قُلْ إِنْ أَدْرِىٓ أَقَرِيبٌ مَّا تُوعَدُونَ أَمْ يَجْعَلُ لَهُۥ رَبِّىٓ أَمَدًا ﴿٢٦﴾

26. පවසන්න, 'නුඹලාට පොරොන්දු වන ලද දේ ඉතා සමීපයෙහිද නැතහොත් මාගේ අධිපතියාණන් එයට දිගු කාල අවධියක් නියම කර ඇත්තේදැයිද මම නොදනිමි'.

عَٰلِمُ ٱلْغَيْبِ فَلَا يُظْهِرُ عَلَىٰ غَيْبِهِۦٓ أَحَدًا ﴿٢٧﴾

27. (ඔහු) ගුප්ත දේ ගැන මැනැවින් දත්තාය. තවද ඔහු තම ගුප්ත දේ කිසිවෙකුටත් හෙළි නොකරන්නේය.

إِلَّا مَنِ ٱرْتَضَىٰ مِن رَّسُولٍ فَإِنَّهُۥ يَسْلُكُ مِنۢ بَيْنِ يَدَيْهِ وَمِنْ خَلْفِهِۦ رَصَدًا ﴿٢٨﴾

28. ඔහු දූතයෙකු ලෙස තෝරා ගන්නා අය හැරය. තවද ඔහුගේ (දූතයාගේ) ඉදිරිපසින්ද ඔහුගේ පිටුපසින්ද (සුර දූතයින්ව) ආරක්ෂක බලකායක් ලෙස පෙළට ගමන් කිරීමට සලස්වන්නේය.

لِّيَعْلَمَ أَن قَدْ أَبْلَغُوا۟ رِسَٰلَٰتِ رَبِّهِمْ وَأَحَاطَ بِمَا لَدَيْهِمْ وَأَحْصَىٰ كُلَّ شَىْءٍ عَدَدًۢا ﴿٢٩﴾

29. එය ඔවුන් තම අධිපතියාණන්ගේ පණිවිඩය (සුදුසු පරිදි) පමුණුවා ඇත්තේද යන්න දැනගනු පිණිසය. තවද ඔහු ඔවුන් සතුව ඇති දේ (සියල්ල) වටලා ගන්නේය. තවද ඔහු සියළු දේ ගැන ගණන් තබන්නේය.




## අල් මුzස්zසම්මිල්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يَا أَيُّهَا الْمُزَّمِّلُ ﴿٢﴾

2. පොරොවනයෙන් පොරවාගෙන සිටින්නාණෙනි!

قُمِ اللَّيْلَ إِلَّا قَلِيلًا ﴿٣﴾

3. රාත්‍රියෙහිදී සුළු කොටසක හැර එහි (නැමදීමට) නැගිට සිටින්න.

نِصْفَهُ أَوِ انْقُصْ مِنْهُ قَلِيلًا ﴿٤﴾

4. එයින් අඩක් හෝ එයින් ස්වල්පයක් අඩු කරන්න.

أَوْ زِدْ عَلَيْهِ وَرَتِّلِ الْقُرْآنَ تَرْتِيلًا ﴿٥﴾

5. නැතහොත් ඊට වඩා ස්වල්පයක් වැඩි කරගන්න. තවද කුර්ආනය කල්පනාකාරීව සෙමින් පාරායනා කරන්න.

إِنَّا سَنُلْقِي عَلَيْكَ قَوْلًا ثَقِيلًا ﴿٦﴾

6. සැබැවින්ම අපි බලගතු වදනකින් ඔබ කෙරෙහි වගකීම් පවරන්නෙමු.

إِنَّ نَاشِئَةَ اللَّيْلِ هِيَ أَشَدُّ وَطْئًا وَأَقْوَمُ قِيلًا ﴿٧﴾

7. සැබැවින්ම රාත්‍රියෙහි නැගිට සිටීම (ආත්ම) දමනයට ඉතාමත් බලගතු මෙන්ම (නමස්කාරයෙහි) වදන් අතින් ඉතාමත් ඵලදායීය.

إِنَّ لَكَ فِي النَّهَارِ سَبْحًا طَوِيلًا ﴿٨﴾

8. ඇත්තෙන්ම ඔබට දවස පුරා දීර්ඝ වැඩකටයුතු ඇත.

وَاذْكُرِ اسْمَ رَبِّكَ وَتَبَتَّلْ إِلَيْهِ تَبْتِيلًا ﴿٩﴾

9. එබැවින් ඔබගේ අධිපතියාණන්ගේ නාමය සිහිපත් කරන්න. තවද අවංක කැපවීමකින් යුතුව (තමාව) ඔහු වෙතට කැප කරන්න.

رَبُّ الْمَشْرِقِ وَالْمَغْرِبِ لَا إِلَٰهَ إِلَّا هُوَ فَاتَّخِذْهُ وَكِيلًا ﴿١٠﴾

10. ඔහු නැගෙනහිරටද බස්නාහිරටද අධිපතියාණන්ය. ඔහු හැර නැමදීමට සුදුස්සා අන් කිසිවෙක් නැත. එබැවින් ඔහුවම (ඔබගේ) ආරක්ෂකයෙකු වශයෙන් ගන්න.

وَاصْبِرْ عَلَىٰ مَا يَقُولُونَ وَاهْجُرْهُمْ

11. තවද ඔවුන් පවසන දේ සියල්ල

هَجۡرًا جَمِيۡلًا ﴿۱۱﴾

ඉවසිල්ලෙන් දරා සිටින්න. තවද ඔවුන්ගෙන් ගෞරවනීය අන්දමින් වෙන්ව යන්න.

وَذَرۡنِىۡ وَالۡمُكَذِّبِيۡنَ اُولِى النَّعۡمَةِ وَمَهِّلۡهُمۡ قَلِيۡلًا ﴿۱۲﴾

12. තවද සැප සම්පත් හිමි (සත්‍යය) ප්‍රතික්ෂේප කරන ඔවුන්ව මා වෙත හැර දමන්න. තවද ඔවුනට ටික කාල අවකාශයක් ලබා දෙන්න.

اِنَّ لَدَيۡنَاۤ اَنۡكَالًا وَّجَحِيۡمًا ۙ﴿۱۳﴾

13. නියතවශයෙන්ම අප වෙත (බරින් වූ) විලංගු ද (ඇවිලෙන්නාවූ) නිරා ගින්නද ඇත.

وَّطَعَامًا ذَا غُصَّةٍ وَّعَذَابًا اَلِيۡمًا ۗ﴿۱۴﴾

14. තවද උගුර හිර කරන ආහාරද එමෙන්ම වේදනීය දඬුවමද.

يَوۡمَ تَرۡجُفُ الۡاَرۡضُ وَالۡجِبَالُ وَكَانَتِ الۡجِبَالُ كَثِيۡبًا مَّهِيۡلًا ﴿۱۵﴾

15. එදින මහ පොළොව සහ කඳු පර්වත කම්පනයට පත්වනු ඇත. තවද කඳු පර්වත සුනුවිසුණු වූ වැලි කඳු බවට පත්වනු ඇත.

اِنَّاۤ اَرۡسَلۡنَاۤ اِلَيۡكُمۡ رَسُوۡلًا ۙ شَاهِدًا عَلَيۡكُمۡ كَمَاۤ اَرۡسَلۡنَاۤ اِلٰى فِرۡعَوۡنَ رَسُوۡلًا ؕ﴿۱۶﴾

16. අප ෆිර්අවුන් වෙත දූතයෙකුව එවූවාක් මෙන් සැබැවින්ම අපි නුඹලා වෙතද සාක්ෂිකරුවෙක් ලෙස දූතයෙකුව එවා ඇත්තෙමු.

فَعَصٰى فِرۡعَوۡنُ الرَّسُوۡلَ فَاَخَذۡنٰهُ اَخۡذًا وَّبِيۡلًا ﴿۱۷﴾

17. නමුත් ෆිර්අවුන් එම දූතයාණන්ට අකීකරු විය. එබැවින් අපි ඔහුව දරුණු හසු කිරීමකින් හසුකර ගත්තෙමු.

فَكَيۡفَ تَتَّقُوۡنَ اِنۡ كَفَرۡتُمۡ يَوۡمًا يَّجۡعَلُ الۡوِلۡدَانَ شِيۡبًا ۖ﴿۱۸﴾

18. එබැවින් නුඹලා අවිශ්වාස කළේ නම්, දරුවන්ව වයෝවෘධ කරන්නාවූ එම දිනයට එරෙහිව නුඹලා තමන්ව ආරක්ෂා කරගන්නේ කෙසේද?

اۨلسَّمَآءُ مُنۡفَطِرٌۢ بِهٖ ؕ كَانَ وَعۡدُهٗ مَفۡعُوۡلًا ﴿۱۹﴾

19. (එදිනෙහිදී) අහස පැළී යනු ඇත. තවද මෙය ඉටු වන්නාවූ ඔහුගේ පොරොන්දුවයි.

إِنَّ هَٰذِهِۦ تَذْكِرَةٌ ۖ فَمَن شَآءَ ٱتَّخَذَ إِلَىٰ رَبِّهِۦ سَبِيلًا ۝٢٠

20. මෙය නියතවශයෙන්ම සිහිපත් කර දීමක්ය. එබැවින් යමෙක් අභිමත වන්නේද ඔහු තම අධිපතියාණන් වෙතට (යන) මාර්ගය පාදා ගනිත්වා.

إِنَّ رَبَّكَ يَعْلَمُ أَنَّكَ تَقُومُ أَدْنَىٰ مِن ثُلُثَيِ ٱلَّيْلِ وَنِصْفَهُۥ وَثُلُثَهُۥ وَطَآئِفَةٌ مِّنَ ٱلَّذِينَ مَعَكَ ۚ وَٱللَّهُ يُقَدِّرُ ٱلَّيْلَ وَٱلنَّهَارَ ۚ عَلِمَ أَن لَّن تُحْصُوهُ فَتَابَ عَلَيْكُمْ ۖ فَٱقْرَءُوا۟ مَا تَيَسَّرَ مِنَ ٱلْقُرْءَانِ ۚ عَلِمَ أَن سَيَكُونُ مِنكُم مَّرْضَىٰ ۙ وَءَاخَرُونَ يَضْرِبُونَ فِى ٱلْأَرْضِ يَبْتَغُونَ مِن فَضْلِ ٱللَّهِ ۙ وَءَاخَرُونَ يُقَٰتِلُونَ فِى سَبِيلِ ٱللَّهِ ۖ فَٱقْرَءُوا۟ مَا تَيَسَّرَ مِنْهُ ۚ وَأَقِيمُوا۟ ٱلصَّلَوٰةَ وَءَاتُوا۟ ٱلزَّكَوٰةَ وَأَقْرِضُوا۟ ٱللَّهَ قَرْضًا حَسَنًا ۚ وَمَا تُقَدِّمُوا۟ لِأَنفُسِكُم مِّنْ خَيْرٍ تَجِدُوهُ عِندَ ٱللَّهِ هُوَ خَيْرًا وَأَعْظَمَ أَجْرًا ۚ وَٱسْتَغْفِرُوا۟ ٱللَّهَ ۖ إِنَّ ٱللَّهَ غَفُورٌ رَّحِيمٌۢ ۝٢١

21. ඔබ රාත්‍රියෙන් තුනෙන් දෙකකට ආසන්නව හෝ (ඇතැම් විටක) එයින් අඩක් හෝ තුනෙන් එකක් හෝ (නැමදුම් සඳහා) ඔබද ඔබ සමග සිටින අයගෙන් පිරිසක්ද නැගිට සිටින බව නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් දන්නේය. තවද අල්ලාහ් රාත්‍රිය සහ දවාලෙහි ප්‍රමාණය තිරණය කරන්නේය. නුඹලාට එහි (ප්‍රමාණය) ගණන් තබාගත නොහැකි බව ඔහු දන්නේය. එමනිසා ඔහු නුඹලා වෙත කරුණාවෙන් හැරෙන්නේය. එහෙයින් කුර්ආනයෙන් (නුඹලාට) පහසු ආකාරයෙන් පාරායනා කරනු. නුඹලා අතුරෙන් සමහරුන් රෝගාතුර අයද එමෙන්ම තවත් සමහරුන් අල්ලාහ්ගේ අනුග්‍රහය පතා භූමියෙහි ගමනේ යෙදී සිටින අයද එමෙන්ම අල්ලාහ්ගේ මාර්ගයෙහි සටනෙහි යෙදී සිටින තවත් අයද ඇති බව ඔහු දන්නේය. එහෙයින් (නුඹලාට) පහසු තරමක් එයින් පාරායනා කරනු. තවද නැමදුම් ඉටු කරනු. තවද zසකාත් (දුගී බද්ද) ගෙවනු. තවද අල්ලාහ්ට යහපත් ණයක් පිරිනමනු. තවද නුඹලා නුඹලාගේ ආත්මය වෙනුවෙන් කුමන දෙයක් පෙර යවා ඇත්තේද එය අල්ලාහ් අභියස නුඹලා දකින්නෙහුය. එය තිළිණය වශයෙන් වඩා හොඳ මෙන්ම වඩා උසස් වන්නේය. තවද අල්ලාහ්ගෙන් සමාව අයැදිනු. නියතවශයෙන්ම අල්ලාහ් අතිශයින්ම ක්ෂමාන්විතය, පරම දයාබරය.



අල් මුද්දස්සිර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

يَٰٓأَيُّهَا ٱلۡمُدَّثِّرُ ②

2. පිට කබායෙන් පොරොවාගෙන සිටින්නාණෙනි!

قُمۡ فَأَنذِرۡ ③

3. නැගිටින්න. තවද අවවාද කරන්න.

وَرَبَّكَ فَكَبِّرۡ ④

4. තවද ඔබගේ අධිපතියාණන්ව අතිශයින්ම උත්කෘෂ්ට කරන්න.

وَثِيَابَكَ فَطَهِّرۡ ⑤

*5. තවද ඔබගේ වස්ත්‍රය පවිත්‍ර කරන්න.

وَٱلرُّجۡزَ فَٱهۡجُرۡ ⑥

6. තවද ඔබ අපිරිසිදුකම ඉවතලන්න.

وَلَا تَمۡنُن تَسۡتَكۡثِرُ ⑦

7. තවද වැඩිපුර (ආපසු) ලැබීමේ බලාපොරොත්තුවෙන් උපකාර නොකරන්න.

وَلِرَبِّكَ فَٱصۡبِرۡ ⑧

8. තවද ඔබගේ අධිපතියාණන් උදෙසා ඉවසීමෙන් කටයුතු කරන්න.

فَإِذَا نُقِرَ فِي ٱلنَّاقُورِ ⑨

9. තවද සූර් (නලාව) හඬ නංවන කල්හි.

فَذَٰلِكَ يَوۡمَئِذٖ يَوۡمٌ عَسِيرٌ ⑩

10. එම දිනය ඉතා අසීරු දිනයක් වනු ඇත.

عَلَى ٱلۡكَٰفِرِينَ غَيۡرُ يَسِيرٖ ⑪

11. අවිශ්වාසිතයින්ට එය පහසු නොවනු ඇත.

*සටහන. 5: මෙම 'සියාබක' (ثِيَابَكَ) යන වචනය කථා ව්‍යවහාරයෙන් ගතහොත් එයට හදවත යන අර්ථය මිස අන් දෙයක් ගත නොහැක. නමුත් මෙහි ගැටළුව වන්නේ 'සියාබුන්' යන වචනය වචනානුසාරයෙන් ගතහොත් එහි තේරුම ඇඳුම් නොහොත් වස්ත්‍රයන් වීමයි. එබැවින් කථා ව්‍යවහාරයෙන් හදවත යැයි අර්ථකථනය කරන අයහට හදවත පමණක් යැයි අර්ථකථනය දිය නොහැක. 'සියාබක' (ثِيَابَكَ) යන මෙම වචනයෙහි බොහෝ සෙයින් ශුද්ධ වූ වක්තෘවරයාණන්ගේ (එතුමාට ශාන්තිය අත්වේවා) අනුගාමිකයන් සහ එතුමාණන් හා සම්පව සිටි වෙනත් අයද අන්තර්ගත කළ හැක. මේනිසා යෝජනා කළාවූ වචනානුසාර විකල්ප පරිවර්ථනය පාඨකයාට අර්ථකථනයෙහිදී පුළුල් අවස්ථාවක් ගෙන දේ.

12. මාද මා මැවූ අයවද තනිවම හැරදමන්න.

ذَرْنِي وَمَنْ خَلَقْتُ وَحِيدًا ﴿١٢﴾

13. තවද මම ඔහුට වස්තුව සුලභව ලබා දුනිමි.

وَجَعَلْتُ لَهُ مَالًا مَمْدُودًا ﴿١٣﴾

14. තවද (ඔහු) ඉදිරියේ සිටින පුතුන්ද,

وَبَنِينَ شُهُودًا ﴿١٤﴾

15. තවද මම ඔහුට අත්‍යාවශ්‍ය සියළු දේ පිළියෙල කළෙමි.

وَمَهَّدْتُ لَهُ تَمْهِيدًا ﴿١٥﴾

16. එහෙත් (ඔහුට) මා තවත් දිය යුතු යැයි ඔහු කැමති වන්නේය.

ثُمَّ يَطْمَعُ أَنْ أَزِيدَ ﴿١٦﴾

17. අවධාරණයයි! නියතවශයෙන්ම ඔහු අපගේ සළකුණු වලට විරුද්ධ වී ඇත්තේය.

كَلَّا ۖ إِنَّهُ كَانَ لِآيَاتِنَا عَنِيدًا ﴿١٧﴾

18. මම ඉක්මනින්ම ඔහුට වර්ධනය වන්නාවූ දැඩි දඬුවම් පමුණුවන්නෙමි.

سَأُرْهِقُهُ صَعُودًا ﴿١٨﴾

19. බලනු! ඔහු මෙනෙහි කළේය. තවද ගණනය කළේය.

إِنَّهُ فَكَّرَ وَقَدَّرَ ﴿١٩﴾

20. විනාශය ඔහුව හසුකරගනිත්වා! ඔහු කෙසේ ගණනය කළේද!

فَقُتِلَ كَيْفَ قَدَّرَ ﴿٢٠﴾

21. යළිත් විනාශය ඔහුව හසුකරගනිත්වා! ඔහු කෙසේ ගණනය කළේද!

ثُمَّ قُتِلَ كَيْفَ قَدَّرَ ﴿٢١﴾

22. පසුව ඔහු සිතා බැලුවේය.

ثُمَّ نَظَرَ ﴿٢٢﴾

23. පසුව ඔහු අප්‍රසන්නතාවය දැක්වීය. තවද තරහින් රවා බැලුවේය.

ثُمَّ عَبَسَ وَبَسَرَ ﴿٢٣﴾

24. පසුව ඔහු පිටුපා උඩඟු විය.

ثُمَّ أَدْبَرَ وَاسْتَكْبَرَ ﴿٢٤﴾

25. තවද ඔහු (මෙසේ) පැවසුවේය, 'මෙය පාරම්පරික විජ්ජාවක් මිස අන් කිසිවක් නොවේ'

فَقَالَ إِنْ هَٰذَا إِلَّا سِحْرٌ يُؤْثَرُ ﴿٢٥﴾

إِنْ هَٰذَآ إِلَّا قَوْلُ ٱلْبَشَرِ ٢٦

26. 'මෙය මිනිසෙකුගේ වචනය මිස අන් කිසිවක් නොවේ'.

سَأُصْلِيهِ سَقَرَ ٢٧

27. මම ඉක්මනින් ඔහුව 'සකර්'හි හෙලන්නෙමි.

وَمَآ أَدْرَىٰكَ مَا سَقَرُ ٢٨

28. තවද 'සකර්' යන්න ඔබට දැන්වූයේ කුමක්ද?

لَا تُبْقِى وَلَا تَذَرُ ٢٩

29. එය කිසිවක් ඉතිරිව තබන්නේද නැත. තවද එය කිසිවක් අත් හරින්නේද නැත.

لَوَّاحَةٌ لِّلْبَشَرِ ٣٠

30. එය සම දවාලන්නක්ය.

عَلَيْهَا تِسْعَةَ عَشَرَ ٣١

31. එය මත (සුරදූතයින්) දහ නවයකි.

وَمَا جَعَلْنَآ أَصْحَٰبَ ٱلنَّارِ إِلَّا مَلَٰٓئِكَةً ۙ وَمَا جَعَلْنَا عِدَّتَهُمْ إِلَّا فِتْنَةً لِّلَّذِينَ كَفَرُوا۟ لِيَسْتَيْقِنَ ٱلَّذِينَ أُوتُوا۟ ٱلْكِتَٰبَ وَيَزْدَادَ ٱلَّذِينَ ءَامَنُوٓا۟ إِيمَٰنًا ۙ وَلَا يَرْتَابَ ٱلَّذِينَ أُوتُوا۟ ٱلْكِتَٰبَ وَٱلْمُؤْمِنُونَ ۙ وَلِيَقُولَ ٱلَّذِينَ فِى قُلُوبِهِم مَّرَضٌ وَٱلْكَٰفِرُونَ مَاذَآ أَرَادَ ٱللَّهُ بِهَٰذَا مَثَلًا ۚ كَذَٰلِكَ يُضِلُّ ٱللَّهُ مَن يَشَآءُ وَيَهْدِى مَن يَشَآءُ ۚ وَمَا يَعْلَمُ جُنُودَ رَبِّكَ إِلَّا هُوَ ۚ وَمَا هِىَ إِلَّا ذِكْرَىٰ لِلْبَشَرِ ٣٢

32. තවද අපි නිරා ගින්නේ පාලකයින් ලෙස නියම කර ඇත්තේ සුරදූතයින්ව මිස අන් කිසිවෙකු නොවේ. තවද අපි ඔවුන්ගේ ගණනය නියම කර ඇත්තේ අවිශ්වාස කළ අයහට පිරික්සුමක් මිස නැත. එය පුස්තකය දෙන ලද අය ස්ථිරභාවය කරා එළඹෙනු පිණිසය. තවද විශ්වාස කළ අය විශ්වාසයේ වර්ධනය වනු පිණිසය. තවද පුස්තකය දෙන ලද අය මෙන්ම විශ්වාසිතයින්ද සැකයෙහි නොවනු පිණිසය. තවද 'අල්ලාහ් මෙම උපමාවෙන් අදහස් කරන්නේ කුමක්දැ?'යි තම සිත්හි රෝගය ඇති අයද අවිශ්වාසිතයින්ද කියනු පිණිසය. මෙයාකාරයට අල්ලාහ් ඔහු අභිමත අයව නොමග ගිය බවට තීරණය කරන අතර ඔහු අභිමත අයහට මග පෙන්වන්නේය. තවද ඔබගේ අධිපතියාණන්ගේ සේනාවන් ගැන දන්නේ ඔහු හැර අන් කිසිවෙක් නොවේ. තවද මෙය මිනිසාට සිහිපත් කිරීමක් මිස අන් කිසිවක් නොවේ.

كَلَّا وَٱلْقَمَرِ ٣٣

33. නොඑසේය, චන්ද්‍රයා මත දිවුරමින්,

وَالَّيْلِ اِذْ اَدْبَرَ ﴿٣٤﴾

34. තවද, රාත්‍රිය මතද, එය පසුබසින කල්හි,

وَالصُّبْحِ اِذَآ اَسْفَرَ ﴿٣٥﴾

35. තවද, අරුණෝදය මතද, එය දීප්තිමත් වන කල්හි,

اِنَّهَا لَاِحْدَى الْكُبَرِ ﴿٣٦﴾

36. සැබැවින්ම එය අති මහත් (විපත්තියන්)ගෙන් එකකි.

نَذِيْرًا لِّلْبَشَرِ ﴿٣٧﴾

37. මිනිසාට අවවාද කරන්නක්ද වේ.

لِمَنْ شَآءَ مِنْكُمْ اَنْ يَّتَقَدَّمَ اَوْ يَتَاَخَّرَ ﴿٣٨﴾

38. නුඹලාගෙන් ඉදිරියට යන්නට හෝ පසුබසින්නට කැමැති අයෙකුටය.

كُلُّ نَفْسٍۭ بِمَا كَسَبَتْ رَهِيْنَةٌ ﴿٣٩﴾

39. සියළු ආත්මයක්ම තමන් ඉපැයූ දෙයට වගකිව යුත්තක්ය.

اِلَّآ اَصْحٰبَ الْيَمِيْنِ ﴿٤٠﴾

40. දකුණත අය හැරෙන්නටය.

معانقة عند المتقدمين

فِيْ جَنّٰتٍ يَتَسَآءَلُوْنَ ﴿٤١﴾

41. (ඔවුන්) උයන්හි එකිනෙකාගෙන් විචාරමින් (සිටින්නෝය).

عَنِ الْمُجْرِمِيْنَ ﴿٤٢﴾

42. වරදකරුවන් පිළිබඳව,

مَا سَلَكَكُمْ فِيْ سَقَرَ ﴿٤٣﴾

43. 'නුඹලාව 'සකර්' (නිරය) තුලට ගෙන ආවේ කුමක්ද?'

قَالُوْا لَمْ نَكُ مِنَ الْمُصَلِّيْنَ ﴿٤٤﴾

44. ඔවුහු (මෙසේ) කියන්නෝය. 'අපි නැමදුම් ඉටුකරන්නන් අතර නොවූයෙමු'.

وَلَمْ نَكُ نُطْعِمُ الْمِسْكِيْنَ ﴿٤٥﴾

45. 'අපි දිළිඳුන්ට ආහාර නොදී සිටියෙමු'.

وَكُنَّا نَخُوْضُ مَعَ الْخَآئِضِيْنَ ﴿٤٦﴾

46. 'තවද අපි අනවශ්‍ය කතාවෙහි නියැලී සිටින්නන් සමග එහි නියැලී සිටියෙමු'.

وَكُنَّا نُكَذِّبُ بِيَوْمِ الدِّيْنِ ﴿٤٧﴾

47. 'තවද අපි විනිශ්චය දිනය ප්‍රතික්ෂේප කරමින් සිටියෙමු'.

حَتّٰىٓ اَتٰىنَا الْيَقِيْنُ ﴿٤٨﴾

48. 'අපව මරණය වෙළා ගන්නා තුරු'.

فَمَا تَنْفَعُهُمْ شَفَاعَةُ الشّٰفِعِيْنَ ﴿٤٩﴾

49. එබැවින් මැදිහත් වන්නන්ගේ මැදිහත්වීම ඔවුන්ට ඵලක් නොවනු ඇත.

فَمَا لَهُمْ عَنِ التَّذْكِرَةِ مُعْرِضِينَ ﴿٥٠﴾

50. එහෙයින් ඔවුන් අනුශාසනාවෙන් පිටුපා යෑමට ඔවුනට කුමක් සිදුවීද?

كَأَنَّهُمْ حُمُرٌ مُّسْتَنفِرَةٌ ﴿٥١﴾

51. ඔවුන් තැතිගත් බූරුවන් මෙන්ය.

فَرَّتْ مِن قَسْوَرَةٍ ﴿٥٢﴾

52. සිංහයාගෙන් පලායන්නා වූ,

بَلْ يُرِيدُ كُلُّ امْرِئٍ مِّنْهُمْ أَن يُؤْتَىٰ صُحُفًا مُّنَشَّرَةً ﴿٥٣﴾

53. එහෙත් ඔවුන්ගෙන් සෑම මිනිසෙක්ම තමන්ට (සුබ අනාවරණයෙන් යුත්) විවෘත වූ ලියවිලි ලැබිය යුතු යැයි කැමති වන්නේය.

كَلَّا ۖ بَل لَّا يَخَافُونَ الْآخِرَةَ ﴿٥٤﴾

54. කිසිසේත් නොව! ඔවුහු පරලොව ගැන සැබැවින්ම බිය නොවන්නෝය.

كَلَّا إِنَّهُ تَذْكِرَةٌ ﴿٥٥﴾

55. කිසිසේත් නොව! මෙය සැබැවින්ම අනුශාසනාවකි.

فَمَن شَاءَ ذَكَرَهُ ﴿٥٦﴾

56. ඒනිසා කැමති අය එය සිහිපත් කරත්වා.

وَمَا يَذْكُرُونَ إِلَّا أَن يَشَاءَ اللَّهُ ۚ هُوَ أَهْلُ التَّقْوَىٰ وَأَهْلُ الْمَغْفِرَةِ ﴿٥٧﴾

57. තවද අල්ලාහ් අභිමත වන්නේ නම් මිස ඔවුන් සිහිපත් නොකරති. බිය බැතිමත්කම පිරිනමන්නේ ඔහුමය. තවද ක්ෂමාව දෙන්නේද ඔහුමය.




අල් කියාමහ්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ١

2. අවධාරණයයි! පුනරුත්ථාන දිනය මත මම දිවුරමි.

لَاۤ اُقۡسِمُ بِيَوۡمِ الۡقِيٰمَةِ ۙ ٢

3. තවද නිතර නිතර දොස් කියන්නාවූ ආත්මය මතද මම දිවුරමි.

وَلَاۤ اُقۡسِمُ بِالنَّفۡسِ اللَّوَّامَةِ ؕ ٣

4. මිනිසා, ඔහුගේ ඇටකටු අප එක්රැස් නොකරන්නේයැයි සිතන්නේද?

اَيَحۡسَبُ الۡاِنۡسَانُ اَلَّنۡ نَّجۡمَعَ عِظَامَهٗ ؕ ٤

5. නොඑසේය, ඔහුගේ සෑම ඇඟිලි තුඩු පවා නැවත සකස් කිරීමට අපට බලය ඇත.

بَلٰى قٰدِرِيۡنَ عَلٰٓى اَنۡ نُّسَوِّىَ بَنَانَهٗ ٥

6. නමුත් මිනිසා මින් ඉදිරියටත් පාපය නිරතුරුවම කරගෙන යන්නට කැමැති වන්නේය.

بَلۡ يُرِيۡدُ الۡاِنۡسَانُ لِيَفۡجُرَ اَمَامَهٗ ۚ ٦

7. 'පුනරුත්ථාන දිනය කවදාදැ?'යි ඔහු අසන්නේය.

يَسۡـَٔلُ اَيَّانَ يَوۡمُ الۡقِيٰمَةِ ؕ ٧

8. ඇස නිලංකාර වන කල්හි.

فَاِذَا بَرِقَ الۡبَصَرُ ۙ ٨

9. තවද චන්ද්‍රයාට ග්‍රහණය ඇති වන්නේය.

وَخَسَفَ الۡقَمَرُ ۙ ٩

10. තවද සූර්යයා සහ චන්ද්‍රයා එක් කරනු ලබන්නේය.

وَجُمِعَ الشَّمۡسُ وَالۡقَمَرُ ۙ ١٠

11. එදිනෙහිදී මිනිසා 'බේරියන්නේ කොයිබටදැ?'යි පවසන්නේය.

يَقُوۡلُ الۡاِنۡسَانُ يَوۡمَـئِذٍ اَيۡنَ الۡمَفَرُّ ۚ ١١

12. අවධාරණයයි! කිසිදු පිළිසරණක් නැත!

كَلَّا لَا وَزَرَ ؕ ١٢

13. එදිනෙහි නවාතැන ඔබගේ අධිපතියාණන් වෙත පමණි.

اِلٰى رَبِّكَ يَوۡمَـئِذِ اۨلۡمُسۡتَقَرُّ ؕ ١٣

يُنَبَّؤُا الْإِنسَانُ يَوْمَئِذٍ بِمَا قَدَّمَ وَأَخَّرَ ﴿١٤﴾

14. එදිනෙහි මිනිසාට, ඔහු පෙර යවා ඇති දේ මෙන්ම පසුපස හැරගිය දේ ගැනද දන්වනු ලබන්නේය.

بَلِ الْإِنسَانُ عَلَىٰ نَفْسِهِ بَصِيرَةٌ ﴿١٥﴾

15. එහෙත් මිනිසා තමා ගැන මනා විමසිල්ලෙන්ය.

وَلَوْ أَلْقَىٰ مَعَاذِيرَهُ ﴿١٦﴾

16. ඔහු තමාගේ නිදහසට කරුණු ඉදිරිපත් කළද.

لَا تُحَرِّكْ بِهِ لِسَانَكَ لِتَعْجَلَ بِهِ ﴿١٧﴾

17. ඔබ මෙය (කුර්ආනය) ඉක්මනින් පහළ වනු පිණිස ඔබගේ දිව නොසොලවන්න.

إِنَّ عَلَيْنَا جَمْعَهُ وَقُرْآنَهُ ﴿١٨﴾

18. නියතවශයෙන්ම මෙය ගොනු කිරීම සහ මෙහි පාරායනය අප කෙරෙහි (වගකීම)ය.

فَإِذَا قَرَأْنَاهُ فَاتَّبِعْ قُرْآنَهُ ﴿١٩﴾

19. එබැවින් අපි එය පාරායනය කරන විට ඔබ එම පාරායනය අනුගමනය කරන්න.

ثُمَّ إِنَّ عَلَيْنَا بَيَانَهُ ﴿٢٠﴾

20. පසුව එය විවරණය කිරීම අප කෙරෙහි (වගකීම)ය.

كَلَّا بَلْ تُحِبُّونَ الْعَاجِلَةَ ﴿٢١﴾

21. අවධාරණයයි! නමුත් නුඹලා වත්මන් ජීවිතය ප්‍රිය කරන්නෙහුය.

وَتَذَرُونَ الْآخِرَةَ ﴿٢٢﴾

22. තවද නුඹලා පරලොව නොසලකා හරින්නෙහුය.

وُجُوهٌ يَوْمَئِذٍ نَّاضِرَةٌ ﴿٢٣﴾

23. එදිනෙහිදී සමහර මුහුණු දීප්තිමත් වනු ඇත.

إِلَىٰ رَبِّهَا نَاظِرَةٌ ﴿٢٤﴾

24. තමන්ගේ අධිපතියාණන් දෙස (ඉතා ඕනෑකමින්) බලමින්ය.

وَوُجُوهٌ يَوْمَئِذٍ بَاسِرَةٌ ﴿٢٥﴾

25. තවද සමහර මුහුණු එදින දුක්මුසු වනු ඇත.

تَظُنُّ أَن يُفْعَلَ بِهَا فَاقِرَةٌ ﴿٢٦﴾

26. කොන්ද කැඩෙන්නාවූ විපත්තිය ඒවාට අත්වන්නේ යැයි සිතති.

كَلَّا إِذَا بَلَغَتِ التَّرَاقِيَ ﴿٢٧﴾

27. අවධාරණයයි! (මරණාසන්න මිනිසෙකුගේ පණ) උගුර කරා පැමිණෙන කල්හි.

وَقِيلَ مَنْ ۜ رَاقٍ ﴿٢٨﴾

28. තවද (ඔහුව බේරාගන්නා) මායා කරුවා කවරෙකුදැයි කියනු ලැබේ.

وَظَنَّ اَنَّهُ الْفِرَاقُ ﴿٢٩﴾

29. තවද එය සමුගැනීමේ (හෝරාව) යැයි ඔහු නිශ්චය කරගන්නේය.

وَالْتَفَّتِ السَّاقُ بِالسَّاقِ ﴿٣٠﴾

30. තවද කකුල (අනෙක්) කකුල සමග (වේදනාවෙන්) අතුල්ලන්නේය.

اِلٰى رَبِّكَ يَوْمَئِذِنِ الْمَسَاقُ ﴿٣١﴾

31. එදින ඔවුන් ඔබගේ අධිපතියාණන් වෙතට දක්කාගෙන යනු ලබන්නෝය.

فَلَا صَدَّقَ وَلَا صَلّٰى ﴿٣٢﴾

32. මන්ද ඔහු (සත්‍යය) පිළිගත්තේද නැත. නැමදුම් ඉටු කළේද නැත.

وَلٰكِنْ كَذَّبَ وَتَوَلّٰى ﴿٣٣﴾

33. නමුත් ඔහු (සත්‍යය) ප්‍රතික්ෂේප කළේය. තවද පිටුපා ගියේය.

ثُمَّ ذَهَبَ اِلٰى اَهْلِهٖ يَتَمَطّٰى ﴿٣٤﴾

34. පසුව ඔහු උඩඟු ලීලාවෙන් ඇවිදගෙන තම ඥාතීන් වෙත ගියේය.

اَوْلٰى لَكَ فَاَوْلٰى ﴿٣٥﴾

35. 'නුඹ කෙරෙහි විපතය! තවද යළිත් විපතය!'

ثُمَّ اَوْلٰى لَكَ فَاَوْلٰى ﴿٣٦﴾

36. 'පසුවද නුඹ කෙරෙහි විපතය! යලි යලිත් විපතය!'

اَيَحْسَبُ الْاِنْسَانُ اَنْ يُّتْرَكَ سُدًى ﴿٣٧﴾

37. තමා සිතුමතේ අයාලේ යෑමට ඉඩ හරිනු ලබන්නේයැයි මිනිසා සිතන්නේද?

اَلَمْ يَكُ نُطْفَةً مِّنْ مَّنِيٍّ يُّمْنٰى ﴿٣٨﴾

38. ඔහු (මිනිසා) මෝචනය කරනු ලැබූ ශුක්‍ර බිඳුවක් නොවූයේද?

ثُمَّ كَانَ عَلَقَةً فَخَلَقَ فَسَوّٰى ﴿٣٩﴾

39. පසුව ඔහු ලේ කැටියක් බවට පත්විය. ඉන් පසුව ඔහු (මිනිසාව) හැඩ ගස්වා සම්පූර්ණ කළේය.

فَجَعَلَ مِنْهُ الزَّوْجَيْنِ الذَّكَرَ وَالْاُنْثٰى ﴿٤٠﴾

40. පසුව ඔහු ඔහුගෙන් පුරුෂ සහ ස්ත්‍රී ජෝඩු ඇති කළේය.

اَلَيْسَ ذٰلِكَ بِقٰدِرٍ عَلٰى اَنْ يُّحْيِۦَ الْمَوْتٰى ﴿٤١﴾

41. මෙවැන්නෙක් වන ඔහු මළවුනට ජීවය දෙන්නට බලය ඇත්තෙකු නොවේද?



අල් දහ්ර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

هَلۡ أَتَىٰ عَلَى ٱلۡإِنسَٰنِ حِينٞ مِّنَ ٱلدَّهۡرِ لَمۡ يَكُن شَيۡـٔٗا مَّذۡكُورًا ②

2. තමා ගැන සඳහන් කිරීමට වැදගත්කමක් නැති කාල අවධියක් මිනිසාට නොපැමිණියේද?

إِنَّا خَلَقۡنَا ٱلۡإِنسَٰنَ مِن نُّطۡفَةٍ أَمۡشَاجٖ نَّبۡتَلِيهِ فَجَعَلۡنَٰهُ سَمِيعَۢا بَصِيرًا ③

3. නියතවශයෙන්ම අපි මිනිසාව මිශ්‍රවූ ශුක්‍ර බිඳුවකින් මවා ඇත්තේ අපි ඔහුව පිරික්සනු පිණිසය. පසුව අපි ඔහුව අසන්නෙකු (සහ) දකින්නෙකු බවට පත් කළෙමු.

إِنَّا هَدَيۡنَٰهُ ٱلسَّبِيلَ إِمَّا شَاكِرٗا وَإِمَّا كَفُورًا ④

4. ඔහු කෘතඥ වුවද නැතහොත් අකෘතඥ වුවද නියතවශයෙන්ම අපි ඔහුට යහමාර්ගය පෙන්වා දී ඇත්තෙමු.

إِنَّآ أَعۡتَدۡنَا لِلۡكَٰفِرِينَ سَلَٰسِلَاْ وَأَغۡلَٰلٗا وَسَعِيرًا ⑤

5. සැබැවින්ම අපි අවිශ්වාසිතයින් සඳහා දම්වැල්ද ගෙලට යකඩ මාංචුද ඇවිලෙන ගින්නද පිළියෙළ කර ඇත්තෙමු.

إِنَّ ٱلۡأَبۡرَارَ يَشۡرَبُونَ مِن كَأۡسٖ كَانَ مِزَاجُهَا كَافُورًا ⑥

6. නමුත් දැහැමියන් කපුරු පදමකින් යුත් බඳුනකින් පානය කරන්නෝය.

عَيۡنٗا يَشۡرَبُ بِهَا عِبَادُ ٱللَّهِ يُفَجِّرُونَهَا تَفۡجِيرٗا ⑦

7. දිය උල්පතකි. එයින් අල්ලාහ්ගේ දාසයින් පානය කරති. ඔවුන් එය වේගයෙන් උතුරා ගලා යෑමට සලස්වති.

يُوفُونَ بِٱلنَّذۡرِ وَيَخَافُونَ يَوۡمٗا كَانَ شَرُّهُۥ مُسۡتَطِيرٗا ⑧

8. ඔවුහු (තමන්ගේ) භාරය ඉටුකරති. තවද එහි නපුර පුළුල්ව පැතිරෙන්නාවූ දිනයට බිය වෙති.

وَيُطۡعِمُونَ ٱلطَّعَامَ عَلَىٰ حُبِّهِۦ مِسۡكِينٗا

9. තවද ඔවුන් ඔහු කෙරෙහි (දැක්වූ) ස්නේහය නිසා දිළිඳුන්ටද

وَّيَتِيمًا وَّأَسِيرًا ﴿٩﴾

අනාථයින්ටද සිරකරුවන්ටද ආහාර දෙන්නෝය.

إِنَّمَا نُطْعِمُكُمْ لِوَجْهِ اللَّهِ لَا نُرِيدُ مِنكُمْ جَزَاءً وَّلَا شُكُورًا ﴿١٠﴾

10. (මෙසේ පවසමින්ය), 'අප නුඹලාට ආහාර දෙන්නේ අල්ලාහ්ගේ තෘප්තිය උදෙසා පමණි. අපි නුඹලාගෙන් කිසිදු තිළිණයක් හෝ ස්තුතියක් හෝ අපේක්ෂා නොකරන්නෙමු'.

إِنَّا نَخَافُ مِن رَّبِّنَا يَوْمًا عَبُوسًا قَمْطَرِيرًا ﴿١١﴾

11. 'සැබැවින්ම අපි අපගේ අධිපතියාණන් වෙතින් අප්‍රසන්න මෙන්ම දුක්මුසු දිනයට බිය වන්නෙමු.'

فَوَقَاهُمُ اللَّهُ شَرَّ ذَٰلِكَ الْيَوْمِ وَلَقَّاهُمْ نَضْرَةً وَّسُرُورًا ﴿١٢﴾

12. එබැවින් අල්ලාහ් ඔවුන්ව එදිනෙහි නපුරෙන් මුදවා ගන්නේය. තවද ඔවුනට ප්‍රමෝදයද සතුටද පිරිනමන්නේය.

وَجَزَاهُم بِمَا صَبَرُوا جَنَّةً وَّحَرِيرًا ﴿١٣﴾

13. තවද ඔවුන්ගේ ඉවසීම හේතු කොටගෙන ඔහු ඔවුනට උද්‍යානයක්ද සේද (වස්ත්‍ර)ද තිළිණ කරන්නේය

مُّتَّكِئِينَ فِيهَا عَلَى الْأَرَائِكِ ۖ لَا يَرَوْنَ فِيهَا شَمْسًا وَّلَا زَمْهَرِيرًا ﴿١٤﴾

14. එහි සෝපාවන් මත සැතපෙන්නන්ය. ඔවුනට එහි අධික උෂ්ණය මෙන්ම අධික ශීතලද නොදැනෙනු ඇත.

وَدَانِيَةً عَلَيْهِمْ ظِلَالُهَا وَذُلِّلَتْ قُطُوفُهَا تَذْلِيلًا ﴿١٥﴾

15. තවද එහි සෙවනැලි ඔවුන් මත ඉතා සමීප වනු ඇත. තවද එහි පොකුරු වශයෙන් පළතුරු ඉතා පහසුවෙන් ලඟා කර ගැනීමට සලස්වනු ඇත.

وَيُطَافُ عَلَيْهِم بِآنِيَةٍ مِّن فِضَّةٍ وَّأَكْوَابٍ كَانَتْ قَوَارِيرَا ﴿١٦﴾

قرء حفص بغير الألف في الوصل فيهما ووقف على الأول بالألف وعلى الثاني بغير الألف

16. තවද රිදී බඳුන් මෙන්ම වීදුරු ගුරුලේත්තුද ඔවුන් වටා යවනු ලබන්නේය.

قَوَارِيرَ مِن فِضَّةٍ قَدَّرُوهَا تَقْدِيرًا ﴿١٧﴾

17. රිදියෙන් (තැනූ) වීදුරු පාත්‍රය ඔවුන් එය විශිෂ්ඨ නිපුණත්වයෙන් හැඩගස්වා ඇත.

وَيُسْقَوْنَ فِيهَا كَأْسًا كَانَ مِزَاجُهَا

18. තවද එහිදී ඉඟුරු පදමකින් යුත් බඳුනක් ඔවුනට පානය පිණිස දෙනු

زَنجَبِيلًا ۝١٨

ලබන්නේය,

عَيْنًا فِيهَا تُسَمَّىٰ سَلْسَبِيلًا ۝١٩

19. එහි සල්සබිල් නම් වූ උල්පතකි.

وَيَطُوفُ عَلَيْهِمْ وِلْدَانٌ مُّخَلَّدُونَ إِذَا رَأَيْتَهُمْ حَسِبْتَهُمْ لُؤْلُؤًا مَّنثُورًا ۝٢٠

20. තවද වයසට නොයන යෞවනයින් ඔවුන්ට සේවය පිණිස බලාසිටින්නෝය. ඔබ ඔවුන්ව දකින කල්හි, ඔවුන් විසිරන ලද මුතු යැයි ඔබ සිතන්නෙහිය.

وَإِذَا رَأَيْتَ ثَمَّ رَأَيْتَ نَعِيمًا وَمُلْكًا كَبِيرًا ۝٢١

21. තවද ඔබ දකින කල්හි එහි දිව්‍ය සැපතක් සහ ශ්‍රේෂ්ඨ රාජධානියක් ඔබ දකින්නෙහිය.

عَالِيَهُمْ ثِيَابُ سُندُسٍ خُضْرٌ وَإِسْتَبْرَقٌ ۖ وَحُلُّوا أَسَاوِرَ مِن فِضَّةٍ وَسَقَاهُمْ رَبُّهُمْ شَرَابًا طَهُورًا ۝٢٢

22. ඔවුන් මත, ගෙත්තම් කළ සියුම් සේද සහ රළු සේද සහිත කොළ පැහැති වස්ත්‍රයන් වනු ඇත. තවද ඔවුන් රිදී වළලුවලින් සරසනු ලබන්නෝය. තවද ඔවුන්ගේ අධිපතියාණන් ඔවුනට පිවිතුරු පානය බීමට දෙන්නේය.

إِنَّ هَٰذَا كَانَ لَكُمْ جَزَاءً وَكَانَ سَعْيُكُم مَّشْكُورًا ۝٢٣

23. 'මෙය නුඹලා සඳහා වන තිළිණයකි. තවද නුඹලාගේ පරිශ්‍රමය අගය කරනු ලැබ ඇත.'

إِنَّا نَحْنُ نَزَّلْنَا عَلَيْكَ الْقُرْآنَ تَنزِيلًا ۝٢٤

24. නියතවශයෙන්ම අපිම මෙම කුර්ආනය ඔබ කෙරෙහි ටිකින් ටික පහළ කර ඇත්තෙමු.

فَاصْبِرْ لِحُكْمِ رَبِّكَ وَلَا تُطِعْ مِنْهُمْ آثِمًا أَوْ كَفُورًا ۝٢٥

25. එබැවින් ඔබගේ අධිපතියාණන්ගේ විනිශ්චය සඳහා ඉවසිල්ලෙන් බලා සිටින්න. තවද ඔවුන්ගෙන් පාපකාරී හෝ අකෘතඥ කිසිවෙකුටත් යටත් නොවන්න.

وَاذْكُرِ اسْمَ رَبِّكَ بُكْرَةً وَأَصِيلًا ۝٢٦

26. තවද ඔබගේ අධිපතියාණන්ගේ නාමය උදේ සහ සවස සිහිපත් කරන්න.

وَمِنَ اللَّيْلِ فَاسْجُدْ لَهُ وَسَبِّحْهُ لَيْلًا طَوِيلًا ۝٢٧

27. තවද රාත්‍රී සමයේදී ඔහු අභියස ඔබ සුජූද්(නළල බිම තබා නමස්කාරයෙ)හි යෙදෙන්න. තවද රාත්‍රියේ දිගු වේලාවක් ඔහුව අතිශයින්ම සුවිශුද්ධ කරන්න.

اِنَّ هٰٓؤُلَآءِ يُحِبُّوْنَ الْعَاجِلَةَ وَيَذَرُوْنَ وَرَآءَهُمْ يَوْمًا ثَقِيْلًا ﴿٢٨﴾

28. සැබැවින්ම මෙම (ජනතාව) මෙලොව ජීවිතය ප්‍රිය කරන්නෝය. තවද, මොවුන්ට ඉදිරියෙහි ඇති දුෂ්කර දිනය නොසලකා හරින්නෝය.

نَحْنُ خَلَقْنٰهُمْ وَشَدَدْنَآ اَسْرَهُمْ ۚ وَاِذَا شِئْنَا بَدَّلْنَآ اَمْثَالَهُمْ تَبْدِيْلًا ﴿٢٩﴾

29. අපිම මොවුන්ව මවා ඇත්තෙමු. තවද, අපි මොවුන්ගේ හන්දිපත් ශක්තිමත් කළෙමු. තවද, අපි අභිමත වූයේ නම් මොවුන් වෙනුවට අපට මොවුන් මෙන් වෙනත් අයවද, ගෙන ආ හැක.

اِنَّ هٰذِهٖ تَذْكِرَةٌ ۚ فَمَنْ شَآءَ اتَّخَذَ اِلٰى رَبِّهٖ سَبِيْلًا ﴿٣٠﴾

30. සැබැවින්ම මෙය අනුශාසනාවක් වේ. එබැවින් යමෙක් කැමති වන්නේද, ඔහු තම අධිපතියාණන් වෙතට යන මාර්ගය පාදා ගනිත්වා.

وَمَا تَشَآءُوْنَ اِلَّآ اَنْ يَّشَآءَ اللّٰهُ ؕ اِنَّ اللّٰهَ كَانَ عَلِيْمًا حَكِيْمًا ۖ ﴿٣١﴾

31. තවද, අල්ලාහ් (එලෙස) අභිමත වුවානම් මිස නුඹලාට නුඹලාගේ සිතැඟියාවන් ක්‍රියාත්මක කිරීමට නොහැක. සැබැවින්ම අල්ලාහ් සියල්ල දන්නාය, ප්‍රඥාසම්පන්නය.

يُّدْخِلُ مَنْ يَّشَآءُ فِىْ رَحْمَتِهٖ ؕ وَالظّٰلِمِيْنَ اَعَدَّ لَهُمْ عَذَابًا اَلِيْمًا ﴿٣٢﴾ ع

32. ඔහු තම අභිමත අයව ඔහුගේ දයාවෙහි ඇතුළුවීමට සලස්වන්නේය. තවද, වැරදිකරුවන් සඳහා ඔහු වේදනීය දඬුවමක් පිළියෙල කර ඇත්තේය.



අල් මුර්සලාත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالْمُرْسَلٰتِ عُرْفًا ②

2. විධිමත්ව එවනු ලබන්නාවූ දේවල් මත දිව්රමින්,

فَالْعٰصِفٰتِ عَصْفًا ③

3. පසුව ඉතා වේගවත් ගමනින් සහ ප්‍රබලව හමන්නාවූ දේ මතද,

وَّالنّٰشِرٰتِ نَشْرًا ④

4. තවද විශිෂ්ඨ පැතිරවීමකින් පතුරුවන්නා වූ අය මතද,

فَالْفٰرِقٰتِ فَرْقًا ⑤

5. ඉන්පසුව ප්‍රත්‍යක්ෂව වෙන් කොට හඳුනාගන්නන් මතද,

فَالْمُلْقِيٰتِ ذِكْرًا ⑥

6. තවද අනුශාසනාව (ඇත එපිට) රැගෙන යන්නන් මතද,

عُذْرًا اَوْ نُذْرًا ⑦

7. සමාව දීමක් හෝ අවවාද කිරීමක් ලෙසය.

اِنَّمَا تُوْعَدُوْنَ لَوَاقِعٌ ⑧

8. සැබැවින්ම නුඹලාට පොරොන්දු වන ලද දෙය සිදු වන්නේමය.

فَاِذَا النُّجُوْمُ طُمِسَتْ ⑨

9. එබැවින් තාරකාවන් අඳුරු කරනු ලබන කල්හි,

وَاِذَا السَّمَآءُ فُرِجَتْ ⑩

10. තවද අහස දෙකඩව පළනු ලබන කල්හි,

وَاِذَا الْجِبَالُ نُسِفَتْ ⑪

11. තවද කඳු සුනු විසුණු කරනු ලබන කල්හි,

وَاِذَا الرُّسُلُ اُقِّتَتْ ⑫

12. තවද දූතයින් නියමිත කාලයේදී ගෙන එනු ලබන කල්හි,

لِاَيِّ يَوْمٍ اُجِّلَتْ ⑬

13. (මේ සිදුවීම්හි) කාලය කුමන දිනයකට නියම කරන ලද්දේද?

لِيَوْمِ الْفَصْلِ ⑭

14. තීන්දු කරන්නා වූ දිනයටය.

وَمَآ أَدْرَىٰكَ مَا يَوْمُ ٱلْفَصْلِ ١٥

15. තවද තීන්දු කරන්නාවූ දිනය යන්න ඔබට දැනගැනීමට සලස්වන්නේ කුමක්ද?

وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ١٦

16. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

أَلَمْ نُهْلِكِ ٱلْأَوَّلِينَ ١٧

17. පෙර සිටි ජනතාවන්ව අපි විනාශ නොකළෙමුද?

ثُمَّ نُتْبِعُهُمُ ٱلْـَٔاخِرِينَ ١٨

18. අනතුරුව ඔවුන්ව අනුගමනය කිරීමට පසුව එන්නන්ව අපි සලස්වන්නෙමු.

كَذَٰلِكَ نَفْعَلُ بِٱلْمُجْرِمِينَ ١٩

19. වැරදිකරුවන් සමග අප කටයුතු කරන්නේ මෙලෙසය.

وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ٢٠

20. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

أَلَمْ نَخْلُقكُّم مِّن مَّآءٍ مَّهِينٍ ٢١

21. අපි නුඹලාව පහත් දියරයකින් නොමැව්වෙමුද?

فَجَعَلْنَـٰهُ فِى قَرَارٍ مَّكِينٍ ٢٢

22. තවද අපි එය සුරක්ෂිත ස්ථානයක තැබුවෙමු.

إِلَىٰ قَدَرٍ مَّعْلُومٍ ٢٣

23. නියමිත (කාල) පරාසයක් දක්වා.

فَقَدَرْنَا فَنِعْمَ ٱلْقَـٰدِرُونَ ٢٤

24. අප (කාල) ප්‍රමාණය මනින්නේ මෙලෙසය. තවද අපි කෙතරම් විශිෂ්ඨ මිණුම්කරුවන් වෙමුද?

وَيْلٌ يَوْمَئِذٍ لِّلْمُكَذِّبِينَ ٢٥

25. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

أَلَمْ نَجْعَلِ ٱلْأَرْضَ كِفَاتًا ٢٦

26. අපි පොළොව රඳවන තැනක් නොකළෙමුද?

أَحْيَآءً وَأَمْوَٰتًا ٢٧

27. ජීවත්ව සිටින්නන්ට මෙන්ම මළවුන්ටද,

وَجَعَلْنَا فِيهَا رَوَٰسِىَ شَـٰمِخَـٰتٍ
وَأَسْقَيْنَـٰكُم مَّآءً فُرَاتًا ٢٨

28. තවද අපි එහි උස් කඳු පිහිටු වීමු. තවද පානයට මිහිරි ජලයද නුඹලාට ලබා දුන්නෙමු.

| | |
|---|---|
| 29. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය! | وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٢٩﴾ |
| 30. 'නුඹලා මුසාවක් යැයි සැළකූ දේ වෙතට දැන් නික්ම යනු'. | انْطَلِقُوا إِلَىٰ مَا كُنْتُمْ بِهِ تُكَذِّبُونَ ﴿٣٠﴾ |
| 31. 'එසේනම් ශාඛා තුනකින් යුත් සෙවණ දෙසට නික්ම යනු'. | انْطَلِقُوا إِلَىٰ ظِلٍّ ذِي ثَلَاثِ شُعَبٍ ﴿٣١﴾ |
| 32. 'එය සෙවණ ලබා දෙන්නක්ද නොවේ. එමෙන්ම ගිනි ජාලාවෙන් ආරක්ෂා කරන්නක්ද නොවේ.' | لَا ظَلِيلٍ وَلَا يُغْنِي مِنَ اللَّهَبِ ﴿٣٢﴾ |
| 33. එය විශාල බලකොටු මෙන් ගිනිපුපුරු විසිකරන්නේය. | إِنَّهَا تَرْمِي بِشَرَرٍ كَالْقَصْرِ ﴿٣٣﴾ |
| 34. එය තඹ පැහැති ඔටුවන් මෙන්ය. | كَأَنَّهُ جِمَالَتٌ صُفْرٌ ﴿٣٤﴾ |
| 35. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය! | وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٣٥﴾ |
| 36. මෙය ඔවුනට කථා කළ නොහැකි (වන්නාවූ) දිනයකි. | هَٰذَا يَوْمُ لَا يَنْطِقُونَ ﴿٣٦﴾ |
| 37. තවද නිදහසට කරුණු දැක්වීමටද ඔවුනට අවසර දෙනු නොලබන්නේය. | وَلَا يُؤْذَنُ لَهُمْ فَيَعْتَذِرُونَ ﴿٣٧﴾ |
| 38. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය! | وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٣٨﴾ |
| 39. 'මෙය තීරණාත්මක දිනය වේ. අපි නුඹලාවද පෙරවූ සියළු ජනතාවන්ද එක්රැස් කර ඇත්තෙමු'. | هَٰذَا يَوْمُ الْفَصْلِ ۖ جَمَعْنَاكُمْ وَالْأَوَّلِينَ ﴿٣٩﴾ |
| 40. 'දැන් නුඹලා වෙත යම් කූට උපායක් තිබේ නම් එය මාහට එරෙහිව යොදනු.' | فَإِنْ كَانَ لَكُمْ كَيْدٌ فَكِيدُونِ ﴿٤٠﴾ |
| 41. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය! | وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٤١﴾ |
| 42. නියතවශයෙන්ම බියබැතිමතුන් සෙවණැලි සහ දිය උල්පත් (අතරෙ)හිය. | إِنَّ الْمُتَّقِينَ فِي ظِلَالٍ وَعُيُونٍ ﴿٤٢﴾ |

وَفَوَاكِهَ مِمَّا يَشْتَهُونَ ﴿٤٣﴾

43. තවද ඔවුන් ප්‍රිය කරන පළතුරු අතරෙහිය.

كُلُوا وَاشْرَبُوا هَنِيئًا بِمَا كُنْتُمْ تَعْمَلُونَ ﴿٤٤﴾

44. 'නුඹලා කළ දේට තිළිණයක් වශයෙන් ප්‍රමෝදව අනුභව කරනු. තවද පානය කරනු'.

إِنَّا كَذَٰلِكَ نَجْزِي الْمُحْسِنِينَ ﴿٤٥﴾

45. නියතවශයෙන්ම අප යහකම් කරන්නන්හට තිළිණ දෙන්නේ මෙලෙසය.

وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٤٦﴾

46. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

كُلُوا وَتَمَتَّعُوا قَلِيلًا إِنَّكُمْ مُجْرِمُونَ ﴿٤٧﴾

47. '(මෙලොවෙහි) දී කලකට අනුභව කරනු භුක්ති විඳිනු. (එම්බල සත්‍යය ප්‍රතික්ෂේපකරුවනි!) නියතවශයෙන්ම නුඹලාම වරදකරුවන්ය'.

وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٤٨﴾

48. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

وَإِذَا قِيلَ لَهُمُ ارْكَعُوا لَا يَرْكَعُونَ ﴿٤٩﴾

49. තවද ඔවුනට, 'යටහත් වනු'යි කියනු ලැබූ විට ඔවුන් යටහත් නොවන්නෝය.

وَيْلٌ يَوْمَئِذٍ لِلْمُكَذِّبِينَ ﴿٥٠﴾

50. එදින (සත්‍යය) ප්‍රතික්ෂේප කරන්නන් හට විපතය!

فَبِأَيِّ حَدِيثٍ بَعْدَهُ يُؤْمِنُونَ ﴿٥١﴾

51. එසේනම් මින් පසු ඔවුන් කුමන වදන කෙරෙහි විශ්වාස කරන්නෝද?



අල් නබා
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.



عَمَّ يَتَسَآءَلُونَ ②

2. කුමක් ගැන ඔවුන් එකිනෙකාගෙන් ප්‍රශ්න කරන්නෝද?

عَنِ ٱلنَّبَإِ ٱلۡعَظِيمِ ③

3. ඉතාමත් වැදගත් වූ ආරංචින් ගැනය.

ٱلَّذِي هُمۡ فِيهِ مُخۡتَلِفُونَ ④

4. එය පිළිබඳව ඔවුන් මත භේද ඇති කරන්නන්ය.

كَلَّا سَيَعۡلَمُونَ ⑤

5. නොඑසේය, ඉක්මනින්ම ඔවුන් දැනගන්නෝමය.

ثُمَّ كَلَّا سَيَعۡلَمُونَ ⑥

6. නොඑසේය, නැවතත් (අපි එය මෙසේ පවසන්නෙමු). ඔවුන් විගසින්ම දැනගන්නෝමය.

أَلَمۡ نَجۡعَلِ ٱلۡأَرۡضَ مِهَٰدًا ⑦

7. අපි පොළොව යහනක් නොකළෙමුද?

وَٱلۡجِبَالَ أَوۡتَادًا ⑧

8. තවද කඳු කුඤ්ඤ ලෙස (නොකළෙමු)ද?

وَخَلَقۡنَٰكُمۡ أَزۡوَٰجًا ⑨

9. තවද අපි නුඹලාව ජෝඩු වශයෙන් මවා ඇත්තෙමු.

وَجَعَلۡنَا نَوۡمَكُمۡ سُبَاتًا ⑩

10. තවද අපි නුඹලාගේ නින්ද විවේකය සඳහා කළෙමු.

وَجَعَلۡنَا ٱلَّيۡلَ لِبَاسًا ⑪

11. තවද අපි රාත්‍රිය ආවරණයක් ලෙස කළෙමු.

وَجَعَلۡنَا ٱلنَّهَارَ مَعَاشًا ⑫

12. තවද අපි දහවල ජීවනෝපාය සඳහා කළෙමු.

وَبَنَيۡنَا فَوۡقَكُمۡ سَبۡعًا شِدَادًا ⑬

13. තවද අපි නුඹලාට ඉහළින් ශක්තිමත් (අහස්) සතක් නිර්මාණය කර ඇත්තෙමු.

وَجَعَلۡنَا سِرَاجًا وَهَّاجًا ⑭

14. තවද අපි (සූර්යයාව) දීප්තිමත් පහනක් කළෙමු.

وَّاَنْزَلْنَا مِنَ الْمُعْصِرٰتِ مَآءً ثَجَّاجًا ۙ ﴿١٥﴾

15. තවද අපි මේඝ වළාවන්ගෙන් බහුලව ඇද හැලෙන්නාවූ ජලය පහළ කරන්නෙමු.

لِّنُخْرِجَ بِهٖ حَبًّا وَّنَبَاتًا ۙ ﴿١٦﴾

16. එමගින් අප ධාන්‍ය සහ ගස් කොළ හටගන්වනු පිණිසය.

وَّجَنّٰتٍ اَلْفَافًا ؕ ﴿١٧﴾

17. තවද සරුසාරව වැඩුණු උද්‍යානයන්ද.

اِنَّ يَوْمَ الْفَصْلِ كَانَ مِيْقَاتًا ۙ ﴿١٨﴾

18. නියතවශයෙන්ම තීරණාත්මක දිනයට නියමිත කාලයක් ඇත.

يَّوْمَ يُنْفَخُ فِى الصُّوْرِ فَتَاْتُوْنَ اَفْوَاجًا ۙ ﴿١٩﴾

19. එදින සූර් (නලාව) පිඹිනු ලබන්නේය. එවිට නුඹලා රංචු රංචු වශයෙන් පැමිණෙන්නෙහුය.

وَّفُتِحَتِ السَّمَآءُ فَكَانَتْ اَبْوَابًا ۙ ﴿٢٠﴾

20. තවද අහස විවෘත කරනු ලබන්නේය. පසුව එය දොරටු බවට පත්වන්නේය.

وَّسُيِّرَتِ الْجِبَالُ فَكَانَتْ سَرَابًا ؕ ﴿٢١﴾

21. තවද කඳු පර්වත ඉවත් කරනු ලබන්නේය. තවද (ඒවා) මිරිඟුවක් (මෙන්) වනු ඇත.

اِنَّ جَهَنَّمَ كَانَتْ مِرْصَادًا ۖ ﴿٢٢﴾

22. නියතවශයෙන්ම නිරය පහර දීමට මාන බලන්නේය.

لِّلطّٰغِيْنَ مَاٰبًا ۙ ﴿٢٣﴾

23. (එය) කැරලිකරුවන් සඳහා වූ නිවහනකි.

لّٰبِثِيْنَ فِيْهَآ اَحْقَابًا ۚ ﴿٢٤﴾

24. ඔවුන් එහි කාලාන්තරයක් රැඳී සිටින්නන්ය.

لَا يَذُوْقُوْنَ فِيْهَا بَرْدًا وَّلَا شَرَابًا ۙ ﴿٢٥﴾

25. ඔවුන් එහි කිසිදු සිසිලසක් හෝ කිසිදු වර්ගයේ පානයක් හෝ රස නොවිඳින්නෝය.

اِلَّا حَمِيْمًا وَّغَسَّاقًا ۙ ﴿٢٦﴾

26. උතුරන්නා වූ ජලය සහ සැරව මිසය.

جَزَآءً وِّفَاقًا ؕ ﴿٢٧﴾

27. (මෙයම) සුදුසු ප්‍රතිවිපාකයකි.

اِنَّهُمْ كَانُوْا لَا يَرْجُوْنَ حِسَابًا ۙ ﴿٢٨﴾

28. සැබැවින්ම ඔවුන් ගණන් විමසීම කෙරෙහි බිය නොවූහ.

وَّكَذَّبُوْا بِاٰيٰتِنَا كِذَّابًا ؕ ﴿٢٩﴾

29. තවද අපගේ සළකුණු ඔවුන් තරයේම ප්‍රතික්ෂේප කළහ.

| | |
|---|---|
| 30. තවද අපි සියළු දේ (වාර්තා) පොතෙහි සටහන් කර ඇත්තෙමු. | وَكُلَّ شَيْءٍ أَحْصَيْنَٰهُ كِتَٰبًا ۝٣٠ |
| 31. 'එබැවින් නුඹලා (දඬුවම) විඳිනු. අපි නුඹලාට වධ වේදනාව මිස අන් කිසි දෙයක් වැඩි නොකරන්නෙමු'. | فَذُوقُوا فَلَن نَّزِيدَكُمْ إِلَّا عَذَابًا ۝٣١ |
| 32. සැබැවින්ම බියබැතිමතුන් සඳහා ජයග්‍රහණය (නියමවී) ඇත. | إِنَّ لِلْمُتَّقِينَ مَفَازًا ۝٣٢ |
| 33. පවුරෙන් වටවූ උයන්ද මිදි වැල්ද, | حَدَآئِقَ وَأَعْنَٰبًا ۝٣٣ |
| 34. තවද සම වයසින් යුත් තරුණ කන්‍යාවියන්ද, | وَكَوَاعِبَ أَتْرَابًا ۝٣٤ |
| 35. තවද පිරී ඉතිරෙන්නාවූ බඳුන්ද, | وَكَأْسًا دِهَاقًا ۝٣٥ |
| 36. එහිදී ඔවුන් නිශ්චල කථාවද බොරුවද නොඅසති. | لَّا يَسْمَعُونَ فِيهَا لَغْوًا وَلَا كِذَّٰبًا ۝٣٦ |
| 37. ඔබගේ අධිපතියාණන් වෙතින් තිළිණයක් මෙන්ම (ඔවුන්ගේ ක්‍රියාවන්ගේ) ගණනයට අනුව වන ත්‍යාගයකි. | جَزَآءً مِّن رَّبِّكَ عَطَآءً حِسَابًا ۝٣٧ |
| 38. අහස් සහ පොළොවේ මෙන්ම ඒ අතර ඇති සියළු දේහි අධිපතියාණන්ය, මහා කාරුණිකයාය. ඔහුව අමතන්නට ඔවුන්ට කිසිදු හැකියාවක් නොවනු ඇත. | رَّبِّ ٱلسَّمَٰوَٰتِ وَٱلْأَرْضِ وَمَا بَيْنَهُمَا ٱلرَّحْمَٰنِ لَا يَمْلِكُونَ مِنْهُ خِطَابًا ۝٣٨ |
| 39. එදින ශුද්ධාත්මයද සුරදූතයින්ද පෙළගැසී සිටින්නෝය. එවිට මහා කාරුණික (දෙවියන්) අවසර දුන් අය සහ නිවැරදිවම කතා කරන අය මිස අන් කිසිවෙකු කතා නොකරන්නෝය. | يَوْمَ يَقُومُ ٱلرُّوحُ وَٱلْمَلَٰٓئِكَةُ صَفًّا ۖ لَّا يَتَكَلَّمُونَ إِلَّا مَنْ أَذِنَ لَهُ ٱلرَّحْمَٰنُ وَقَالَ صَوَابًا ۝٣٩ |
| 40. එම දිනය පැමිණෙනු නියතය. එබැවින් යමෙක් කැමති වන්නේද ඔහු තම අධිපතියාණන් දෙසට පිහිට සොයන මාර්ගය පාදා ගනිත්වා. | ذَٰلِكَ ٱلْيَوْمُ ٱلْحَقُّ ۖ فَمَن شَآءَ ٱتَّخَذَ إِلَىٰ رَبِّهِۦ مَـَٔابًا ۝٤٠ |
| 41. සැබැවින්ම අත ළඟ ඇති දඬුවම | إِنَّآ أَنذَرْنَٰكُمْ عَذَابًا قَرِيبًا يَوْمَ يَنظُرُ |

الْمَرْءُ مَا قَدَّمَتْ يَدَاهُ وَيَقُولُ الْكَافِرُ يَا لَيْتَنِي كُنتُ تُرَابًا ﴿٤٠﴾

ගැන අපි නුඹලාට අවවාද කර ඇත්තෙමු. එදින මිනිසා තමාගේ අත් පෙරටුව එවා ඇති දේ දැකගන්නේමය. තවද අවිශ්වාසිතයින්, 'අහෝ මා හුදෙක් දූවිලි බවට පත් වී සිටියා නම්!' යැයි කියන්නෝය.




අල් නාzසිආත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالنّٰزِعٰتِ غَرْقًا ②

2. ගිලිහී කඩිසරව ඇද ගන්නන් මත දිවුරමින්,

وَّالنّٰشِطٰتِ نَشْطًا ③

3. ඉතා සිඝ්‍රව දේශයන් පසු කර යන්නන් මතද,

وَّالسّٰبِحٰتِ سَبْحًا ④

4. තවද සාගරයන් මතුපිට දුර බැහැරව ඉතා සිඝ්‍රයෙන් තරණය කරන්නන් මතද,

فَالسّٰبِقٰتِ سَبْقًا ⑤

5. පසුව ශ්‍රේෂ්ඨත්වය තකා එකිනෙකා සමග තරඟ වදින්නන් මතද,

فَالْمُدَبِّرٰتِ اَمْرًا ⑥

6. පසුව සැලසුම් කර තමන්ගේ කටයුත්ත යහපත්ව ක්‍රියාවට නංවන්නන් මතද,

يَوْمَ تَرْجُفُ الرَّاجِفَةُ ⑦

7. කම්පනයකින් (පොළොව) කම්පනය වන්නාවූ එදින (මෙය සිදුවනු ඇත).

تَتْبَعُهَا الرَّادِفَةُ ⑧

8. දෙවනුව (කම්පනය) එය පසුපස එනු ඇත.

قُلُوْبٌ يَّوْمَئِذٍ وَّاجِفَةٌ ⑨

9. එදිනෙහි හදවත් වෙව්ලනු ඇත.

اَبْصَارُهَا خَاشِعَةٌ ⑩

10. (තවද) ඔවුන්ගේ නෙත් පහතට යොමුවී තිබෙනු ඇත.

يَقُوْلُوْنَ ءَاِنَّا لَمَرْدُوْدُوْنَ فِى الْحَافِرَةِ ⑪

11. ඔවුන් (මෙසේ) කියන්නෝය, 'අපි (සැබෑ ලෙසම) අපගේ මුල් තත්ත්වයට ගෙන එනු ලබන්නෙමුද?'

ءَاِذَا كُنَّا عِظَامًا نَّخِرَةً ⑫

12. 'කිමද! අප දිරාපත් වූ ඇටකටු බවට පත්වන කල්හිද?'

قَالُوْا تِلْكَ اِذًا كَرَّةٌ خَاسِرَةٌ ⑬

13. ඔවුන් (මෙසේ) කියන්නෝය, 'එසේ නම්, එය ඇත්තෙන්ම පාඩු විඳින්නාවූ ආපසු පැමිණීමක් වනු ඇත'.

14. එය එකම විලාපය පමණක් වනු ඇත.

فَإِنَّمَا هِيَ زَجْرَةٌ وَاحِدَةٌ ﴿١٤﴾

15. තවද, එසැනින්! ඔවුන් (සියල්ල) එළිමහනෙහි (පැමිණෙනු) ඇත.

فَإِذَا هُمْ بِالسَّاهِرَةِ ﴿١٥﴾

16. මුසාගේ වෘත්තාන්තය ඔබ වෙතට පැමිණියේද?

هَلْ أَتَاكَ حَدِيثُ مُوسَىٰ ﴿١٦﴾

17. ඔහුගේ අධිපතියාණන් ඔහුට 'තුවා' නම් ශුද්ධවූ නිම්නයෙහිදී හඬගසා (මෙසේ පැවසූ) කල්හි,

إِذْ نَادَاهُ رَبُّهُ بِالْوَادِ الْمُقَدَّسِ طُوًى ﴿١٧﴾

18. "ඔබ ෆිර්අවුන් වෙතට යන්න. ඔහු කැරලිකාරී වී ඇත.

اذْهَبْ إِلَىٰ فِرْعَوْنَ إِنَّهُ طَغَىٰ ﴿١٨﴾

19. "තවද (ඔහුට මෙසේ) පවසන්න. 'නුඹ පවිත්‍ර වීමට (කැමති) වන්නෙහිද?'

فَقُلْ هَلْ لَكَ إِلَىٰ أَنْ تَزَكَّىٰ ﴿١٩﴾

20. 'තවද නුඹ බිය දක්වනු පිණිස මම නුඹහට නුඹගේ අධිපතියාණන් වෙතට මග පෙන්වන්නෙමි'".

وَأَهْدِيَكَ إِلَىٰ رَبِّكَ فَتَخْشَىٰ ﴿٢٠﴾

21. එබැවින් ඔහු ඔහුට (ෆිර්අවුන්ට) මහත් වූ සළකුණක් පෙන්වූයේය.

فَأَرَاهُ الْآيَةَ الْكُبْرَىٰ ﴿٢١﴾

22. නමුත් ඔහු (මුසාව) ප්‍රතික්ෂේප කර අකීකරු විය.

فَكَذَّبَ وَعَصَىٰ ﴿٢٢﴾

23. පසුව ඔහු (මුසාට එරෙහිව කුමන්ත්‍රණ කිරීමට) වෑයම් කරමින් ඉවත හැරුණේය.

ثُمَّ أَدْبَرَ يَسْعَىٰ ﴿٢٣﴾

24. තවද ඔහු (ඔහුගේ ජනතාව) එක්රැස්කර නිවේදනය කළේය.

فَحَشَرَ فَنَادَىٰ ﴿٢٤﴾

25. තවද 'මම නුඹලාගේ අති උතුම් අධිපතියාණන් වෙමි'යි පැවසුවේය.

فَقَالَ أَنَا رَبُّكُمُ الْأَعْلَىٰ ﴿٢٥﴾

26. එබැවින් පරලොව සහ මෙලොව දඬුවම සඳහා අල්ලාහ් ඔහුව හසුකර ගත්තේය.

فَأَخَذَهُ اللَّهُ نَكَالَ الْآخِرَةِ وَالْأُولَىٰ ﴿٢٦﴾

27. නියතවශයෙන්ම බිය දක්වන අයහට මෙහි පාඩමක් ඇත.

إِنَّ فِي ذَٰلِكَ لَعِبْرَةً لِمَنْ يَخْشَىٰ ﴿٢٧﴾

ءَاَنْتُمْ اَشَدُّ خَلْقًا اَمِ السَّمَآءُ ؕ بَنٰهَا ۛ ٢٨

28. මැවීමට වඩා දුෂ්කර වන්නේ නුඹලාවද නැතහොත් ඔහු නිර්මාණය කර ඇති අහසද?

رَفَعَ سَمْكَهَا فَسَوّٰىهَا ۙ ٢٩

29. ඔහු එහි(අහසෙහි) වියන ඉහළට ඔසවා එය පරිපූර්ණ කළේය.

وَاَغْطَشَ لَيْلَهَا وَاَخْرَجَ ضُحٰىهَا ۠ ٣٠

30. තවද ඔහු එහි රාත්‍රිය කළුවර කළේය. තවද එහි උදය හෙළි කළේය.

وَالْاَرْضَ بَعْدَ ذٰلِكَ دَحٰىهَا ؕ ٣١

31. තවද ඔහු පොළොව (මවා) එයට පසු එය විහිදුවා හැරියේය.

اَخْرَجَ مِنْهَا مَآءَهَا وَمَرْعٰىهَا ۠ ٣٢

32. එමගින් ඔහු එහි ජලය සහ එහි තණබිම්ද ඇති කළේය.

وَالْجِبَالَ اَرْسٰىهَا ۙ ٣٣

33. තවද කඳු පර්වත, ඔහු ඒවා ස්ථාවර කළේය.

مَتَاعًا لَّكُمْ وَلِاَنْعَامِكُمْ ؕ ٣٤

34. (මේ සියල්ල) නුඹලාටද නුඹලාගේ ගව සතුන්ටද ජීවනෝපාය වේ.

فَاِذَا جَآءَتِ الطَّآمَّةُ الْكُبْرٰى ۖ ٣٥

35. නමුත් මහත් ව්‍යසනය පැමිණෙන විට,

يَوْمَ يَتَذَكَّرُ الْاِنْسَانُ مَا سَعٰى ۙ ٣٦

36. එදිනහිදී මිනිසා ඔහු ප්‍රයත්න දැරූ දේ (සියල්ල) සිහියට ගන්නේය.

وَبُرِّزَتِ الْجَحِيْمُ لِمَنْ يَّرٰى ٣٧

37. තවද නිරය බලන අයහට පැහැදිලිව පෙනෙන්නට සලස්වනු ලබන්නේය.

فَاَمَّا مَنْ طَغٰى ۙ ٣٨

38. පසුව කැරළිගසන අය ගත්කල,

وَاٰثَرَ الْحَيٰوةَ الدُّنْيَا ۙ ٣٩

39. එමෙන්ම මෙලොව ජීවිතය තෝරාගත් අයද (ගත්කල),

فَاِنَّ الْجَحِيْمَ هِىَ الْمَاْوٰى ؕ ٤٠

40. නියතවශයෙන්ම නිරාගින්න (ඔවුන්ගේ) නිවහන වන්නේය.

وَاَمَّا مَنْ خَافَ مَقَامَ رَبِّهٖ وَنَهَى النَّفْسَ عَنِ الْهَوٰى ۙ ٤١

41. නමුත් කවරෙක් තම අධිපතියාණන්ගේ උසස් තත්ත්වය කෙරෙහි බිය දක්වා තම ආත්මය නපුරු සිතැඟියාවන්ගෙන් වළක්වා ගන්නේද, ඒ අය ගත්කල,

42. නියතවශයෙන්ම ස්වර්ගය (ඔවුන්ගේ) නිවහන වන්නේය.

فَإِنَّ الْجَنَّةَ هِيَ الْمَأْوَىٰ ﴿٤٢﴾

43. ඔවුන් ඔබගෙන් එම හෝරාව ගැන 'එය පැමිණෙන්නේ කවදාදැ?'යි අසන්නෝය.

يَسْأَلُونَكَ عَنِ السَّاعَةِ أَيَّانَ مُرْسَاهَا ﴿٤٣﴾

44. නමුත් ඒ සම්බන්ධව සඳහන් කිරීම ගැන ඔබට කරන්නට තිබෙන්නේ කුමක්ද?

فِيمَ أَنتَ مِن ذِكْرَاهَا ﴿٤٤﴾

45. එහි අවසන් දැනුම ඇත්තේ ඔබගේ අධිපතියාණන් වෙතය.

إِلَىٰ رَبِّكَ مُنتَهَاهَا ﴿٤٥﴾

46. නියතවශයෙන්ම ඔබ ඒ කෙරෙහි බිය දක්වන අයට අවවාද කරුවෙක් පමණි.

إِنَّمَا أَنتَ مُنذِرُ مَن يَخْشَاهَا ﴿٤٦﴾

47. ඔවුන් එය දකින දිනයේදී ඔවුන් (ලොවෙහි) සවසක හෝ එහි උදයක හෝ මිස නොසිටියාක් මෙන් (ඔවුනට දැනෙනු ඇත).

كَأَنَّهُمْ يَوْمَ يَرَوْنَهَا لَمْ يَلْبَثُوا إِلَّا عَشِيَّةً أَوْ ضُحَاهَا ﴿٤٧﴾




අබස
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

عَبَسَ وَتَوَلّٰٓىۙ ②

2. ඔහු(දූතයාණන්) අප්‍රසන්නතාවය දැක්වීය. තවද ඉවත හැරුණේය.

اَنۡ جَآءَهُ الۡاَعۡمٰىؕ ③

3. එය අන්ධ මිනිසෙකු ඔහු වෙත පැමිණි හේතුවෙනි.

وَمَا يُدۡرِيۡكَ لَعَلَّهٗ يَزَّكّٰٓىۙ ④

4. තවද ඔහු(අන්ධ මිනිසා) පිවිතුරු විය හැකි යැයි (එම්බල දූතයාණෙනි!) ඔබට දන්වන්නේ කුමක්ද?

اَوۡ يَذَّكَّرُ فَتَنۡفَعَهُ الذِّكۡرٰىؕ ⑤

5. නොඑසේනම් ඔහු අනුශාසනාව ලැබුවහොත් එම අනුශාසනාව ඔහුට ප්‍රයෝජනවත් වන්නට පුළුවන.

اَمَّا مَنِ اسۡتَغۡنٰىۙ ⑥

6. නමුත් කවරෙකු හෝ නොසැලකිලිමත් වන්නේද,

فَاَنۡتَ لَهٗ تَصَدّٰىؕ ⑦

7. ඔහු වෙත ඔබ අවධානය යොමු කරන්නෙහිය.

وَمَا عَلَيۡكَ اَلَّا يَزَّكّٰىؕ ⑧

8. ඔහු පිවිතුරු නොවන්නේ නම් ඔබ කෙරෙහි කිසිදු වගකීමක් නැත.

وَاَمَّا مَنۡ جَآءَكَ يَسۡعٰىۙ ⑨

9. නමුත් කවරෙකු හෝ ඔබ වෙත කඩිනමින් පැමිණෙන්නේද,

وَهُوَ يَخۡشٰىۙ ⑩

10. තවද ඔහු (දෙවියන්) කෙරෙහි බිය වන්නේද,

فَاَنۡتَ عَنۡهُ تَلَهّٰىۚ ⑪

11. ඔබ ඔහුට නොසැළකුවේය යැයි (චෝදනාකරුවන් කියන්නෝය).

كَلَّاۤ اِنَّهَا تَذۡكِرَةٌ ۚ ⑫

12. නොඑසේය, නියතවශයෙන්ම මෙය අනුශාසනාවකි.

فَمَنۡ شَآءَ ذَكَرَهٗ ۘ ⑬

13. එබැවින් කවරෙකු හෝ අභිමත වන්නේද ඔහු මෙය සිහිතබා ගනිත්වා!

14. (මෙය) ගෞරවනීය ලියවිලිවලය.

فِيْ صُحُفٍ مُّكَرَّمَةٍ ﴿١٤﴾

15. අති උසස්වූද පරිශුද්ධ වූද.

مَّرْفُوْعَةٍ مُّطَهَّرَةٍۭ ﴿١٥﴾

16. ලේඛකයන්ගේ අත්වලින්ය.

بِاَيْدِيْ سَفَرَةٍ ﴿١٦﴾

17. උදාර (මෙන්ම) දැහැමිය.

كِرَامٍۭ بَرَرَةٍ ﴿١٧﴾

18. මිනිසා විනාශ වේවා! ඔහු කෙතරම් අකෘතඥද!

قُتِلَ الْاِنْسَانُ مَآ اَكْفَرَهٗ ﴿١٨﴾

19. ඔහු කවර දෙයකින් ඔහුව (මිනිසාව) මැව්වේද?

مِنْ اَيِّ شَيْءٍ خَلَقَهٗ ﴿١٩﴾

20. ශුක්‍ර බිඳුවකින්ය! ඔහු ඔහුව මැව්වේය. තවද ඔහුට ප්‍රමාණුකූල (අභිවෘද්ධිය) සලස්වා දුන්නේය.

مِنْ نُّطْفَةٍ خَلَقَهٗ فَقَدَّرَهٗ ﴿٢٠﴾

21. පසුව ඔහු මාර්ගය ඔහුට පහසු කර දුන්නේය.

ثُمَّ السَّبِيْلَ يَسَّرَهٗ ﴿٢١﴾

22. පසුව ඔහු ඔහුව මරණයට පත් කළේය. තවද ඔහුව සොහොනෙහි ඇතුළු කරවීය.

ثُمَّ اَمَاتَهٗ فَاَقْبَرَهٗ ﴿٢٢﴾

23. පසුව ඔහු කැමතිවන විටකදී ඔහුව නැවතත් ඔහු නැගිටුවන්නේය.

ثُمَّ اِذَا شَآءَ اَنْشَرَهٗ ﴿٢٣﴾

24. අවධාරණයයි! ඔහුට (ඉටු කිරීමට) ඔහු අණකළ දේ ඔහු තවමත් නිම නොකළේය.

كَلَّا لَمَّا يَقْضِ مَآ اَمَرَهٗ ﴿٢٤﴾

25. දැන් මිනිසා ඔහුගේ ආහාරය දෙස බලත්වා.

فَلْيَنْظُرِ الْاِنْسَانُ اِلٰى طَعَامِهٖٓ ﴿٢٥﴾

26. අපි කෙසේ බහුලව ජලය වස්සවන්නෙමුද!

اَنَّا صَبَبْنَا الْمَآءَ صَبًّا ﴿٢٦﴾

27. පසුව අපි පොළොව නියමාකාරයෙන් පළන්නෙමු.

ثُمَّ شَقَقْنَا الْاَرْضَ شَقًّا ﴿٢٧﴾

28. පසුව අපි එහි ධාන්‍ය වැවෙන්නට සළස්වන්නෙමු.

فَاَنْۢبَتْنَا فِيْهَا حَبًّا ﴿٢٨﴾

| | |
|---|---|
| 29. එමෙන්ම මිදි සහ එළවළුද, | وَّعِنَبًا وَّقَضْبًا ﴿٢٩﴾ |
| 30. තවද ඔලිව් සහ රට ඉඳි ගස්ද, | وَّزَيْتُوْنًا وَّنَخْلًا ﴿٣٠﴾ |
| 31. තවද පවුරෙන් වටවූ ඝනව වැඩුණු උයන්ද, | وَّحَدَآئِقَ غُلْبًا ﴿٣١﴾ |
| 32. තවද පළතුරු සහ පැළෑටිද, | وَّفَاكِهَةً وَّاَبًّا ﴿٣٢﴾ |
| 33. නුඹලාට සහ නුඹලාගේ ගවසතුන්ට ජීවනෝපාය සඳහාය. | مَّتَاعًا لَّكُمْ وَلِاَنْعَامِكُمْ ﴿٣٣﴾ |
| 34. නමුත් (කන්) බිහිරි කරවන්නාවූ මහා ශබ්දය පැමිණෙන විට, | فَاِذَا جَآءَتِ الصَّآخَّةُ ﴿٣٤﴾ |
| 35. මිනිසා තම සහෝදරයාගෙන් පලායන්නාවූ දිනයේදී, | يَوْمَ يَفِرُّ الْمَرْءُ مِنْ اَخِيْهِ ﴿٣٥﴾ |
| 36. තවද ඔහුගේ මව සහ ඔහුගේ පියා(ගෙන්)ද, | وَاُمِّهٖ وَاَبِيْهِ ﴿٣٦﴾ |
| 37. තවද ඔහුගේ භාර්යයාව සහ ඔහුගේ පුතුන්(ගෙන්)ද, | وَصَاحِبَتِهٖ وَبَنِيْهِ ﴿٣٧﴾ |
| 38. එදින ඔවුනතර සෑම මිනිසෙක්ම (අන් අය ගැන) උදාසීනවන තරමට තමා ගැන පමණක් දුක් වන්නේය. | لِكُلِّ امْرِئٍ مِّنْهُمْ يَوْمَئِذٍ شَاْنٌ يُّغْنِيْهِ ﴿٣٨﴾ |
| 39. එදින සමහර මුහුණු දීප්තිමත් වනු ඇත. | وُجُوْهٌ يَّوْمَئِذٍ مُّسْفِرَةٌ ﴿٣٩﴾ |
| 40. සිනහමුසුවද ප්‍රීතිසහගතවද! | ضَاحِكَةٌ مُّسْتَبْشِرَةٌ ﴿٤٠﴾ |
| 41. තවද සමහර මුහුණු මත එදින දූවිලි තැවරී තිබෙනු ඇත. | وَوُجُوْهٌ يَّوْمَئِذٍ عَلَيْهَا غَبَرَةٌ ﴿٤١﴾ |
| 42. අන්ධකාරය ඒවා වෙළාගනු ඇත. | تَرْهَقُهَا قَتَرَةٌ ﴿٤٢﴾ |
| 43. ඔවුහුම අවිශ්වාස කළාවූ (මෙන්ම) දුෂ්ඨ වූ අය වෙති. | اُولٰٓئِكَ هُمُ الْكَفَرَةُ الْفَجَرَةُ ﴿٤٣﴾ |



## අල් තක්වීර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

إِذَا ٱلشَّمۡسُ كُوِّرَتۡ ۝٢

2. සූර්යයා ආවරණය කරනු ලබන කල්හි,

وَإِذَا ٱلنُّجُومُ ٱنكَدَرَتۡ ۝٣

3. තවද තාරකාවන් අඳුරු වන කල්හි,

وَإِذَا ٱلۡجِبَالُ سُيِّرَتۡ ۝٤

4. තවද කඳු පර්වත ඉවත් කරනු ලබන කල්හි,

وَإِذَا ٱلۡعِشَارُ عُطِّلَتۡ ۝٥

5. තවද දස මාස ගැබ්ගත් ඔටු දෙනුන් අත්හරිනු ලබන කල්හි,

وَإِذَا ٱلۡوُحُوشُ حُشِرَتۡ ۝٦

6. තවද සත්වයින් එක්රැස් කරනු ලබන කල්හි,

وَإِذَا ٱلۡبِحَارُ سُجِّرَتۡ ۝٧

7. තවද සයුරු (එකක් තුලට එකක්) ගලා යාමට සලස්වනු ලබන කල්හි,

وَإِذَا ٱلنُّفُوسُ زُوِّجَتۡ ۝٨

8. තවද ජනතාව එක් කරවනු ලබන කල්හි,

وَإِذَا ٱلۡمَوۡءُۥدَةُ سُئِلَتۡ ۝٩

9. තවද පණ පිටින් භූමදානය කරනු ලැබූ ගැහැණු දරුවා පිළිබඳව ප්‍රශ්ණ කරනු ලබන කල්හි,

بِأَيِّ ذَنۢبٖ قُتِلَتۡ ۝١٠

10. 'ඇය මරණ ලද්දේ කුමන අපරාධයටද?'

وَإِذَا ٱلصُّحُفُ نُشِرَتۡ ۝١١

11. තවද පුස්තකයන් විවෘතව පතුරුවනු ලබන කල්හි,

وَإِذَا ٱلسَّمَآءُ كُشِطَتۡ ۝١٢

12. තවද අහස් තිරය නිරාවරණය කරනු ලබන කල්හි,

وَإِذَا ٱلۡجَحِيمُ سُعِّرَتۡ ۝١٣

13. තවද නිරා ගින්න ඇවිළෙන්නට සලස්වනු ලබන කල්හි,

وَإِذَا ٱلۡجَنَّةُ أُزۡلِفَتۡ ۝١٤

14. තවද ස්වර්ගය සමීපයට ගෙන එනු ලබන කල්හි,

15. පසුව සෑම ආත්මයක්ම තමා ගෙන ආ දේ දැනගනු ඇත.

عَلِمَتْ نَفْسٌ مَّآ أَحْضَرَتْ ۝١٥

16. අවධාරණයයි! සූක්ෂම ලෙස පසුබසින්නාවූ දේ මම සාක්ෂියට කැඳවන්නෙමි.

فَلَآ أُقْسِمُ بِالْخُنَّسِ ۝١٦

17. ඉදිරියට යනදේ (මෙන්ම පසුව) සැඟවෙන දේද,

الْجَوَارِ الْكُنَّسِ ۝١٧

18. තවද අවසන් වන්නාවූ රාත්‍රියද (මම සාක්ෂියට කැඳවන්නෙමි).

وَالَّيْلِ إِذَا عَسْعَسَ ۝١٨

19. තවද හිමිදිරිය, එය සුසුම් හෙළන්නට පටන් ගන්නා කල්හි,

وَالصُّبْحِ إِذَا تَنَفَّسَ ۝١٩

20. එනම් නියතවශයෙන්ම මෙය (අනාවරණය කරන ලද) ගෞරවාන්විත දූතයාණන්ගේ වදනකි.

إِنَّهُۥ لَقَوْلُ رَسُولٍ كَرِيمٍ ۝٢٠

21. (දූතයාණන්) බලය හිමියාය. සිහසුනේ අධිපතියාණන්ගේ අභියස ස්ථාවර වූවෙක්ය.

ذِى قُوَّةٍ عِندَ ذِى الْعَرْشِ مَكِينٍ ۝٢١

22. අවනත වූවෙක්ය, එමෙන්ම විශ්වාසය තැබීමට සුදුසු තැනැත්තෙක්ය.

مُّطَاعٍ ثَمَّ أَمِينٍ ۝٢٢

23. තවද නුඹලාගේ සගයා උමතුවෙක් නොවේ.

وَمَا صَاحِبُكُم بِمَجْنُونٍ ۝٢٣

24. තවද ඔහු සැබැවින්ම පැහැදිලි වූ ක්ෂිතිජයෙහි ඔහුව (අල්ලාහ්ව) දුටුවෙහිය.

وَلَقَدْ رَءَاهُ بِالْأُفُقِ الْمُبِينِ ۝٢٤

25. තවද ඔහු අදෘශ්‍යමාන තොරතුරු ගැන (දැනුවත් කිරීමෙහි) මසුරු නොවන්නෙකි.

وَمَا هُوَ عَلَى الْغَيْبِ بِضَنِينٍ ۝٢٥

26. එමෙන්ම මෙය ප්‍රතික්ෂේපිත ෂෙයිතාන්ගේ වදනද නොවේ.

وَمَا هُوَ بِقَوْلِ شَيْطَٰنٍ رَّجِيمٍ ۝٢٦

27. එසේනම් නුඹලා යන්නේ කොයි බටද?

فَأَيْنَ تَذْهَبُونَ ۝٢٧

28. මෙය සර්ව ලෝකයන්ටම අනුශාසනාවක් මිස අන්කිසිවක් නැත.

إِنْ هُوَ إِلَّا ذِكْرٌ لِّلْعَٰلَمِينَ ۝٢٨

لِمَنْ شَآءَ مِنْكُمْ اَنْ يَّسْتَقِيْمَ ﴿٢٩﴾

29. තවද නුඹලා අතුරෙන් සෘජු මගෙහි යෑමට කැමති වන අයහට.

وَمَا تَشَآءُوْنَ اِلَّآ اَنْ يَّشَآءَ اللّٰهُ رَبُّ الْعٰلَمِيْنَ ﴿٣٠﴾

30. එමෙන්ම සර්ව ලෝකයන්ගේ අධිපතියාණන් වන අල්ලාහ් අභිමත වන දේ මිස නුඹලා (අන් කිසිවක්) අභිමත නොවන්නෙහුය.




අල් ඉන්ෆිතාර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِذَا السَّمَآءُ انۡفَطَرَتۡ ۝٢

2. අහස දෙකඩව පැළී යන කල්හි,

وَاِذَا الۡكَوَاكِبُ انۡتَثَرَتۡ ۝٣

3. තවද තාරකාවන් විසිරී යන කල්හි,

وَاِذَا الۡبِحَارُ فُجِّرَتۡ ۝٤

4. තවද මුහුදු පළනු ලබන කල්හි,

وَاِذَا الۡقُبُوۡرُ بُعۡثِرَتۡ ۝٥

5. තවද සොහොන් විවර කරනු ලබන කල්හි,

عَلِمَتۡ نَفۡسٌ مَّا قَدَّمَتۡ وَاَخَّرَتۡ ۝٦

6. (පසුව) සෑම ආත්මයක්ම එය ඉදිරියට යවා ඇති දේ සහ එය පසුපස හැර ගිය දේ දැනගනු ඇත.

يٰۤاَيُّهَا الۡاِنۡسَانُ مَا غَرَّكَ بِرَبِّكَ الۡكَرِيۡمِ ۝٧

7. එම්බා මිනිසා! නුඹගේ කාරුණාවන්ත අධිපතියාණන්ට එරෙහිව නුඹව මුළා කළේ කුමක්ද?

الَّذِىۡ خَلَقَكَ فَسَوّٰٮكَ فَعَدَلَكَ ۝٨

8. ඔහුම නුඹව මවා පසුව නුඹව පරිපූර්ණ කොට පසුව නුඹව නිසියාකාරව සමබර කළේය.

فِىۡۤ اَىِّ صُوۡرَةٍ مَّا شَآءَ رَكَّبَكَ ۝٩

9. ඔහු කැමති ඕනෑම ස්වරූපයකින් ඔහු නුඹව හැඩගැස්විය.

كَلَّا بَلۡ تُكَذِّبُوۡنَ بِالدِّيۡنِ ۝١٠

10. අවධාරණයයි! නුඹලා විනිශ්චය දිනය ප්‍රතික්ෂේප කරන්නෙහුය.

وَاِنَّ عَلَيۡكُمۡ لَحٰفِظِيۡنَ ۝١١

11. එහෙත් නියතවශයෙන්ම නුඹලා කෙරෙහි සුපරීක්ෂකයින් සිටිති.

كِرَامًا كَاتِبِيۡنَ ۝١٢

12. ගෞරවනීය වාර්තාකරුවන්ය,

يَعۡلَمُوۡنَ مَا تَفۡعَلُوۡنَ ۝١٣

13. ඔවුන් නුඹලා කරන (සියල්ල) දන්නෝය.

اِنَّ الۡاَبۡرَارَ لَفِىۡ نَعِيۡمٍ ۝١٤

14. සැබැවින්ම දැහැමියන් දිව්‍ය සැපතෙහිය.

15. තවද නියතවශයෙන්ම දුෂ්ඩයින් නිරයෙහිය.

وَإِنَّ الْفُجَّارَ لَفِي جَحِيمٍ ﴿١٥﴾

16. තවද විනිශ්චය දිනයේදී ඔවුන් එහි දැවෙන්නෝය.

يَصْلَوْنَهَا يَوْمَ الدِّينِ ﴿١٦﴾

17. තවද ඔවුන්ට එයින් බේරී යෑමට නොහැකි වනු ඇත.

وَمَا هُمْ عَنْهَا بِغَائِبِينَ ﴿١٧﴾

18. තවද විනිශ්චය දිනය යන්න ඔබට දැනුවත් කළේ කුමක්ද?

وَمَا أَدْرَاكَ مَا يَوْمُ الدِّينِ ﴿١٨﴾

19. නැවතත් විනිශ්චය දිනය යන්න ඔබට දැනුවත් කළේ කුමක්ද?

ثُمَّ مَا أَدْرَاكَ مَا يَوْمُ الدِّينِ ﴿١٩﴾

20. එදින එක් ආත්මයකට තවත් ආත්මයක් වෙනුවෙන් කිසිවක් කිරීමට කිසිදු බලයක් නොලැබෙන්නේය. එමෙන්ම එදිනෙහිදී නියෝගය අල්ලාහ්ගේම වනු ඇත.

يَوْمَ لَا تَمْلِكُ نَفْسٌ لِنَفْسٍ شَيْئًا ۖ وَالْأَمْرُ يَوْمَئِذٍ لِلَّهِ ﴿٢٠﴾




## අල් තත්ෆීෆ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَيْلٌ لِّلْمُطَفِّفِيْنَ ②

2. කිරුම් මිණුම්වල අඩු කර දෙනවුනට විපතය.

الَّذِيْنَ اِذَا اكْتَالُوْا عَلَى النَّاسِ يَسْتَوْفُوْنَ ③

3. ඔවුහු අන් ජනතාවගෙන් කිරා මැන ලබා ගන්නා විට ඔවුහු එය මුළුමනින්ම ලබා ගනිති.

وَ اِذَا كَالُوْهُمْ اَوْ وَّزَنُوْهُمْ يُخْسِرُوْنَ ④

4. නමුත් ඔවුහු අන් අයට කිරා දෙන විට හෝ ඔවුනට මැන දෙන විට ඔවුහු අඩුවෙන් ලබා දෙති.

اَلَا يَظُنُّ اُولٰٓئِكَ اَنَّهُمْ مَّبْعُوْثُوْنَ ⑤

5. එවන් (මිනිසුන්) තමන් යළි නැගිටවනු ලබන්නේ යැයි නොදනිත්ද?

لِيَوْمٍ عَظِيْمٍ ⑥

6. අතිමහත් මහත් දිනයේ (තීන්දුව) වෙනුවෙන්,

يَّوْمَ يَقُوْمُ النَّاسُ لِرَبِّ الْعٰلَمِيْنَ ⑦

7. එදින සියළු මිනිසුන් සර්ව ලෝකයන්ට අධිපතියාණන්ගේ ඉදිරියෙහි සිටගන්නෝය.

كَلَّآ اِنَّ كِتٰبَ الْفُجَّارِ لَفِيْ سِجِّيْنٍ ⑧

8. අවධාරණයයි! නියතවශයෙන්ම දුෂ්ඨයින්ගේ වාර්තාව 'සිජ්ජීන්'හිය.

وَمَآ اَدْرٰىكَ مَا سِجِّيْنٌ ⑨

9. 'සිජ්ජීන්' යන්න කුමක්දැයි ඔබ හට දැනුවත් කළේ කුමක්ද?

كِتٰبٌ مَّرْقُوْمٌ ⑩

10. (එය සවිස්තරාත්මකව) ලියන ලද පොතකි.

وَيْلٌ يَّوْمَئِذٍ لِّلْمُكَذِّبِيْنَ ⑪

11. එදින ප්‍රතික්ෂේප කරන්නවුනට විපතය.

الَّذِيْنَ يُكَذِّبُوْنَ بِيَوْمِ الدِّيْنِ ⑫

12. විනිශ්චය දිනය ප්‍රතික්ෂේප කරන්නාවූ ඔවුන්ටද (විපතය).

13. තවද සෑම පාපකාරී, සීමාව ඉක්මවන්නන් හැර අන් කිසිවෙක් එය ප්‍රතික්ෂේප නොකරන්නේය.

وَمَا يُكَذِّبُ بِهِۦٓ إِلَّا كُلُّ مُعْتَدٍ أَثِيمٍ ١٣

14. අපගේ වදන් ඔහුට කියා පෙන්වනු ලබන විට, '(ඒවා) පැරැන්නන්ගේ කතාන්තර!' යැයි කියන්නේය.

إِذَا تُتْلَىٰ عَلَيْهِ ءَايَٰتُنَا قَالَ أَسَٰطِيرُ ٱلْأَوَّلِينَ ١٤

15. අවධාරණයයි! නමුත් ඔවුන් උපයා ඇති දේම ඔවුන්ගේ හදවත් මත මලකඩ (ලෙස) බැඳී ඇත.

كَلَّا ۖ بَلْ ۜ رَانَ عَلَىٰ قُلُوبِهِم مَّا كَانُوا۟ يَكْسِبُونَ ١٥

16. අවධාරණයයි! එදිනෙහිදී ඔවුන් තමන්ගේ අධිපතියාණන්ව (දැකීමෙන්) නිශ්චිතවම වළක්වනු ලබන්නෝය.

كَلَّآ إِنَّهُمْ عَن رَّبِّهِمْ يَوْمَئِذٍ لَّمَحْجُوبُونَ ١٦

17. පසුව නිශ්චිතවම ඔවුන් නිරයෙහි දැවෙන්නෝය.

ثُمَّ إِنَّهُمْ لَصَالُوا۟ ٱلْجَحِيمِ ١٧

18. පසුව ඔවුනට (මෙසේ) කියනු ලබන්නේය. 'නුඹලා ප්‍රතික්ෂේප කරමින් සිටි දේ මෙය වේ'.

ثُمَّ يُقَالُ هَٰذَا ٱلَّذِى كُنتُم بِهِۦ تُكَذِّبُونَ ١٨

19. අවධාරණයයි! නමුත් දැහැමියන්ගේ වාර්තාව නියත වශයෙන්ම 'ඉල්ලියීන්' හි ඇත.

كَلَّآ إِنَّ كِتَٰبَ ٱلْأَبْرَارِ لَفِى عِلِّيِّينَ ١٩

20. 'ඉල්ලියීන්' යනු කුමක්දැයි ඔබ හට දැනුවත් කළේ කුමක්ද?

وَمَآ أَدْرَىٰكَ مَا عِلِّيُّونَ ٢٠

21. (එය සවිස්තරාත්මකව) ලියන ලද පොතකි.

كِتَٰبٌ مَّرْقُومٌ ٢١

22. (දෙවියන්ගේ) සමීපවන්තයින් එය දකින්නෝය.

يَشْهَدُهُ ٱلْمُقَرَّبُونَ ٢٢

23. නියතවශයෙන්ම දැහැමියන් දිව්‍ය සැපතෙහි (වන්නෝ)ය.

إِنَّ ٱلْأَبْرَارَ لَفِى نَعِيمٍ ٢٣

24. ඔවුන් සෝපාවන් මත (අසුන්ගෙන) නරඹන්නෝය.

عَلَى ٱلْأَرَآئِكِ يَنظُرُونَ ٢٤

25. ඔබ ඔවුන්ගේ මුහුණුවල දිව්‍ය සැපතේ නැවුම්බව දකින්නෙහිය.

تَعْرِفُ فِى وُجُوهِهِمْ نَضْرَةَ ٱلنَّعِيمِ ٢٥

26. ඔවුන් මුද්‍රා තබන ලද පිවිතුරු පානයකින් බීමට දෙනු ලබන්නෝය.

يُسْقَوْنَ مِن رَّحِيقٍ مَّخْتُومٍ ﴿٢٦﴾

27. එහි මුද්‍රාව කස්තූරියෙන් වනු ඇත. මෙයට ප්‍රිය කරන්නන් ප්‍රිය කරත්වා!

خِتَٰمُهُۥ مِسْكٌ ۚ وَفِى ذَٰلِكَ فَلْيَتَنَافَسِ ٱلْمُتَنَٰفِسُونَ ﴿٢٧﴾

28. තවද එය තස්නීම් (හි ජලය) මගින් පදමට මුසු කරනු ලබන්නේය.

وَمِزَاجُهُۥ مِن تَسْنِيمٍ ﴿٢٨﴾

29. එය තෝරාපත් කරනු ලැබූවන් පානය කරන්නා වූ දිය උල්පතකි.

عَيْنًا يَشْرَبُ بِهَا ٱلْمُقَرَّبُونَ ﴿٢٩﴾

30. නියතවශයෙන්ම වැරදි කරමින් සිටි අය විශ්වාස කළ අය දෙස සිනාසෙමින් සිටියහ.

إِنَّ ٱلَّذِينَ أَجْرَمُوا۟ كَانُوا۟ مِنَ ٱلَّذِينَ ءَامَنُوا۟ يَضْحَكُونَ ﴿٣٠﴾

31. තවද ඔවුන් මොවුන්ව පසුකර යන කල්හි ඔවුන් ඇසිපිය ගසමින් එකිනෙකාට ඉඟි කළහ.

وَإِذَا مَرُّوا۟ بِهِمْ يَتَغَامَزُونَ ﴿٣١﴾

32. තවද ඔවුන් තමන්ගේ පවුලේ අය වෙත ආපසු හැරී ගිය විට, නිෂ්ඵල කතා ගොතමින් හැරී ගියහ.

وَإِذَا ٱنقَلَبُوٓا۟ إِلَىٰٓ أَهْلِهِمُ ٱنقَلَبُوا۟ فَكِهِينَ ﴿٣٢﴾

33. තවද ඔවුන් මොවුන්ව දුටු කල්හි, 'ඇත්තෙන්ම මොවුන් නොමග ගියවුන්මයැ!'යි පැවසූහ.

وَإِذَا رَأَوْهُمْ قَالُوٓا۟ إِنَّ هَٰٓؤُلَآءِ لَضَآلُّونَ ﴿٣٣﴾

34. නමුත් ඔවුන් මොවුන් කෙරෙහි ආරක්ෂකයින් ලෙස එවනු නොලැබූහ.

وَمَآ أُرْسِلُوا۟ عَلَيْهِمْ حَٰفِظِينَ ﴿٣٤﴾

35. එබැවින් මෙදින අවිශ්වාසිතයින් දෙස බලා සිනාසෙන්නේ විශ්වාසිතයින්ය.

فَٱلْيَوْمَ ٱلَّذِينَ ءَامَنُوا۟ مِنَ ٱلْكُفَّارِ يَضْحَكُونَ ﴿٣٥﴾

36. ඔවුන් සෝපාවන් මත (අසුන්ගෙන) නරඹන්නෝය.

عَلَى ٱلْأَرَآئِكِ يَنظُرُونَ ﴿٣٦﴾

37. අවිශ්වාසිතයින්ට ඔවුන් කළ දේ වෙනුවෙන් ඵලවිපාක (නිසිලෙස) දෙනු ලැබුවේදැ?(යි විශ්වාසිතයින් කියති).

هَلْ ثُوِّبَ ٱلْكُفَّارُ مَا كَانُوا۟ يَفْعَلُونَ ﴿٣٧﴾




අල් ඉන්ෂිකාක්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِذَا السَّمَآءُ انْشَقَّتْ ٢

2. අහස පුපුරා පැළී යන කල්හි,

وَاَذِنَتْ لِرَبِّهَا وَحُقَّتْ ٣

3. තවද එය තම අධිපතියාණන්ට ඇහුම්කන් දෙන්නේය. තවද එයම එයට යුතුකමක් වන්නේය.

وَاِذَا الْاَرْضُ مُدَّتْ ٤

4. තවද පොළොව විහිදුවනු ලබන කල්හි.

وَاَلْقَتْ مَا فِيْهَا وَتَخَلَّتْ ٥

5. තවද එය තුල ඇති (සියල්ල) ඉවතලන්නේය. තවද හිස් බවට පත් වන්නේය.

وَاَذِنَتْ لِرَبِّهَا وَحُقَّتْ ٦

6. තවද එය තම අධිපතියාණන්ට ඇහුම්කන් දෙන්නේය. තවද එයම එයට යුතුකමක් වන්නේය.

يٰۤاَيُّهَا الْاِنْسَانُ اِنَّكَ كَادِحٌ اِلٰى رَبِّكَ كَدْحًا فَمُلٰقِيْهِ ٧

7. එම්බා මිනිසා! නියතවශයෙන් නුඹගේ අධිපතියාණන් වෙතට දැඩි උත්සාහයක් දැරුවායින් පසුව නුඹ ඔහුව හමුවීමට යන්නෙක්ය.

فَاَمَّا مَنْ اُوْتِيَ كِتٰبَهٗ بِيَمِيْنِهٖ ٨

8. පසුව යමෙකුට තම (වාර්තා) පොත තම දකුණතට දෙනු ලබන්නේද,

فَسَوْفَ يُحَاسَبُ حِسَابًا يَّسِيْرًا ٩

9. ඔහුගෙන් පහසු ගණන් විමසීමක් ඉක්මණින් ගනු ලබන්නේය.

وَّيَنْقَلِبُ اِلٰۤى اَهْلِهٖ مَسْرُوْرًا ١٠

10. තවද ඔහු, ඔහුගේ නිවැසියන් වෙතට ප්‍රීතිමත්ව ආපසු යනු ඇත.

وَاَمَّا مَنْ اُوْتِيَ كِتٰبَهٗ وَرَآءَ ظَهْرِهٖ ١١

11. නමුත් යමෙකුට තම (වාර්තා) පොත තම පිටුපසින් දෙනු ලබන්නේද,

فَسَوْفَ يَدْعُوْا ثُبُوْرًا ١٢

12. ඔහු විනාශය ඉක්මණින් කැඳවන්නේය.

وَّيَصْلٰى سَعِيْرًا ۝١٣

13. තවද ඔහු ඇවිලෙන්නාවූ ගින්නෙහි දැවෙන්නේය.

اِنَّهٗ كَانَ فِيْٓ اَهْلِهٖ مَسْرُوْرًا ۝١٤

14. සැබැවින්ම (මීට පෙර) ඔහු තම පවුලේ අය අතර ප්‍රීතිමත්ව ජීවත් විය.

اِنَّهٗ ظَنَّ اَنْ لَّنْ يَّحُوْرَ ۝١٥

15. ඇත්තෙන්ම ඔහු කිසිවිටෙකත් (තම දෙවියන්) වෙතට ආපසු නොයනු ලබන්නේ යැයි සිතුවේය.

بَلٰٓى ۛ اِنَّ رَبَّهٗ كَانَ بِهٖ بَصِيْرًا ۝١٦

16. එසේය! නියතවශයෙන්ම, ඔහුගේ අධිපතියාණන් ඔහුව මැනැවින් දකින්නේය.

فَلَآ اُقْسِمُ بِالشَّفَقِ ۝١٧

17. නමුත් අවධාරණයයි! මම සැඳෑ එළිය සාක්ෂියට කැඳවන්නෙමි.

وَالَّيْلِ وَمَا وَسَقَ ۝١٨

18. තවද රාත්‍රියද එය වෙළාගන්නා දේද,

وَالْقَمَرِ اِذَا اتَّسَقَ ۝١٩

19. තවද චන්ද්‍රයා, එය පූර්ණත්වයට පත්වන කල්හි,

لَتَرْكَبُنَّ طَبَقًا عَنْ طَبَقٍ ۝٢٠

20. එනම් නුඹලා සහතිකවම පියවරෙන් පියවර දියුණු වන්නෙහුය.

فَمَا لَهُمْ لَا يُؤْمِنُوْنَ ۝٢١

21. එබැවින් ඔවුන් විශ්වාස නොකරන්නට ඔවුන්ට කුමක් සිදුවීද?

وَاِذَا قُرِئَ عَلَيْهِمُ الْقُرْاٰنُ لَا يَسْجُدُوْنَ ۝٢٢ ۩

22. තවද කුර්ආනය ඔවුනට පාරායනය කරනු ලබන කල්හි ඔවුන් යටහත්ව සුජුද් (නමස්කාරය) නොකරන්නෝය.

بَلِ الَّذِيْنَ كَفَرُوْا يُكَذِّبُوْنَ ۝٢٣

23. එයට පටහැනිව, විශ්වාස නොකරන අය (එය) ප්‍රතික්ෂේප කරති.

وَاللّٰهُ اَعْلَمُ بِمَا يُوْعُوْنَ ۝٢٤

24. තවද ඔවුන් (තමන්ගේ හදවත්හි) සඟවා තැබූ දේ අල්ලාහ් මැනැවින් දන්නේය.

فَبَشِّرْهُمْ بِعَذَابٍ اَلِيْمٍ ۝٢٥

25. එබැවින් ඔවුනට වේදනීය දඬුවමක ආරංචිය දෙන්න.

26. නමුත් විශ්වාස කොට යහපත් ක්‍රියා කරන අය ගත්කල ඔවුනට නිම නොවන්නා වූ තිළිණ ලැබෙනු ඇත.

إِلَّا الَّذِينَ آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ لَهُمْ أَجْرٌ غَيْرُ مَمْنُونٍ ﴿٢٦﴾



අල් බුරූජ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالسَّمَآءِ ذَاتِ الۡبُرُوۡجِۙ ۝٢

2. (තාරකා) මණ්ඩලයෙන් සමන්විත අහස මත දිවුරමින්,

وَالۡيَوۡمِ الۡمَوۡعُوۡدِۙ ۝٣

3. පොරොන්දු වූ දිනය මතද

وَشَاهِدٍ وَّمَشۡهُوۡدٍؕ ۝٤

4. සහතික කරන්නා සහ සහතික කරනු ලබන්නා මතද,

قُتِلَ اَصۡحٰبُ الۡاُخۡدُوۡدِۙ ۝٥

5. අගල් (කපන) ජනතාව ශාපයට පත්වන්නෝය.

النَّارِ ذَاتِ الۡوَقُوۡدِۙ ۝٦

6. ඉන්ධන යොදවන ලද එම ගින්නෙහි අය.

اِذۡ هُمۡ عَلَيۡهَا قُعُوۡدٌۙ ۝٧

7. ඔවුන් ඒ අසල වාඩිවී සිටි කල්හි,

وَّهُمۡ عَلٰى مَا يَفۡعَلُوۡنَ بِالۡمُؤۡمِنِيۡنَ شُهُوۡدٌؕ ۝٨

8. තවද ඔවුන් විශ්වාසිතයින්ට කළ දෙයට ඔවුන් සාක්ෂි දැරූහ.

وَمَا نَقَمُوۡا مِنۡهُمۡ اِلَّاۤ اَنۡ يُّؤۡمِنُوۡا بِاللّٰهِ الۡعَزِيۡزِ الۡحَمِيۡدِۙ ۝٩

9. තවද බලසම්පන්න සහ ප්‍රශංසා හිමි වන අල්ලාහ් කෙරෙහි ඔවුන් විශ්වාස කළ හේතුවෙන් මිස අන්දෙයකට ඔවුහු ඔවුන්ට වෛර නොකළහ.

الَّذِىۡ لَهٗ مُلۡكُ السَّمٰوٰتِ وَالۡاَرۡضِؕ وَاللّٰهُ عَلٰى كُلِّ شَىۡءٍ شَهِيۡدٌ ؕ ۝١٠

10. අහස් සහ පොළොවේ රාජධානිය අයත් වන්නේ ඔහුටමය. තවද අල්ලාහ් සියළු දේ කෙරෙහි සාක්ෂි කරුය.

اِنَّ الَّذِيۡنَ فَتَنُوا الۡمُؤۡمِنِيۡنَ وَالۡمُؤۡمِنٰتِ ثُمَّ لَمۡ يَتُوۡبُوۡا فَلَهُمۡ عَذَابُ جَهَنَّمَ

11. නියතවශයෙන්ම විශ්වාසිත පුරුෂයින් සහ විශ්වාසිත ස්ත්‍රීන්ට හිංසා පමුණුවා පසුව පශ්චාත්තාප නොවන්නන් ගත්කල, ඔවුන්ට නිරයේ දඬුවම ඇත. තවද ඔවුන්ට

දැවෙන්නාවූ දඬුවමද ඇත.

وَلَهُمۡ عَذَابُ ٱلۡحَرِيقِ ١١

12. නමුත් විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කරන්නන් ගත්කල, ඔවුන් සඳහා උද්‍යානයන් ඇත. ඒ තුලින් දියදහරාවන් ගලාබසිනු ඇත. මෙයම අති ශ්‍රේෂ්ඨ වූ ජයග්‍රහණයකි.

إِنَّ ٱلَّذِينَ ءَامَنُواْ وَعَمِلُواْ ٱلصَّٰلِحَٰتِ لَهُمۡ جَنَّٰتٞ تَجۡرِي مِن تَحۡتِهَا ٱلۡأَنۡهَٰرُۚ ذَٰلِكَ ٱلۡفَوۡزُ ٱلۡكَبِيرُ ١٢

13. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන්ගේ ග්‍රහණය ඉතා දැඩිය.

إِنَّ بَطۡشَ رَبِّكَ لَشَدِيدٌ ١٣

14. ආරම්භ කරන්නේද නැවත කරන්නේද ඔහුමය.

إِنَّهُۥ هُوَ يُبۡدِئُ وَيُعِيدُ ١٤

15. තවද ඔහු අතිශයින්ම ක්ෂමාන්විතය, සෙනෙහබරය.

وَهُوَ ٱلۡغَفُورُ ٱلۡوَدُودُ ١٥

16. සිංහාසනයෙහි අධිපතිය, ගෞරවාන්විතයාය.

ذُو ٱلۡعَرۡشِ ٱلۡمَجِيدُ ١٦

17. ඔහු අභිමත දේ ඉටු කරන්නාය.

فَعَّالٞ لِّمَا يُرِيدُ ١٧

18. සේනාවන්හි වෘතාන්තය ඔබ වෙත පැමිණියේද?

هَلۡ أَتَىٰكَ حَدِيثُ ٱلۡجُنُودِ ١٨

19. ෆිර්අවුන්ගේ සහ සමූද්ගේ?

فِرۡعَوۡنَ وَثَمُودَ ١٩

20. නමුත් අවිශ්වාස කරන අය (සත්‍යය) ප්‍රතික්ෂේප කිරීමෙහි (නියැලී සිටින්නෝ)ය.

بَلِ ٱلَّذِينَ كَفَرُواْ فِي تَكۡذِيبٖ ٢٠

21. තවද අල්ලාහ් ඔවුන් නොසිතන ආකාරයට ඔවුන්ව වටලාගන්නේය.

وَٱللَّهُ مِن وَرَآئِهِم مُّحِيطُۢ ٢١

22. නමුත් මෙය මහානුභාව සම්පන්න කුර්ආනය වේ.

بَلۡ هُوَ قُرۡءَانٞ مَّجِيدٞ ٢٢

23. (මනා) සුරක්ෂිත ඵලකයෙහිය.

فِي لَوۡحٖ مَّحۡفُوظِۭ ٢٣




අල් තාරික්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالسَّمَآءِ وَالطَّارِقِ ②

2. අහස මතද අළුයමේ පහන් තරුව මතද දිවුරමින්,

وَمَآ اَدْرٰىكَ مَا الطَّارِقُ ③

3. තවද අළුයමේ පහන්තරුව යනු ඔබට දැනුවත් කළේ කුමක්ද?

النَّجْمُ الثَّاقِبُ ④

4. එය දීප්තිමත්ව විදින්නාවූ තරුවකි.

اِنْ كُلُّ نَفْسٍ لَّمَّا عَلَيْهَا حَافِظٌ ⑤

5. තමා කෙරෙහි ආරක්ෂකයෙකු නොමැති කිසිදු ආත්මයක් නැත.

فَلْيَنْظُرِ الْاِنْسَانُ مِمَّ خُلِقَ ⑥

6. එබැවින් තමා මවන ලද්දේ කවර දෙයින් දැයි මිනිසා මෙනෙහි කරත්වා.

خُلِقَ مِنْ مَّآءٍ دَافِقٍ ⑦

7. පැන නගින්නාවූ දියරයකින් ඔහු මවන ලද්දේය.

يَّخْرُجُ مِنْ بَيْنِ الصُّلْبِ وَالتَّرَآئِبِ ⑧

8. එය තුනටිය සහ ඉල ඇටයන් අතරින් පිටවෙන්නේය.

اِنَّهٗ عَلٰى رَجْعِهٖ لَقَادِرٌ ⑨

9. නියතවශයෙන්ම ඔහුව (මිනිසාව) නැවතත් (ජීවයට) ගෙන ඒමට ඔහුට බලය ඇත.

يَوْمَ تُبْلَى السَّرَآئِرُ ⑩

10. එදින සියළු රහස් හෙළිකරනු ලබන්නේය.

فَمَا لَهٗ مِنْ قُوَّةٍ وَّلَا نَاصِرٍ ⑪

11. එවිට ඔහුට කිසිදු ශක්තියක් හෝ කිසිදු උදව්කරුවෙකු හෝ නොවනු ඇත.

وَالسَّمَآءِ ذَاتِ الرَّجْعِ ⑫

12. නැවත නැවතත් ආපසු පැමිණෙන්නාවූ (වර්ෂා චක්‍රයෙන් යුත්) අහස මත දිවුරමින්,

13. තවද (ගස් කොළන්) පිබිදෙන්නාවූ පොළොව මත දිවුරමින්,

وَالْاَرْضِ ذَاتِ الصَّدْعِ ۙ﴿۱۳﴾

14. මෙය නියතවශයෙන්ම තිරණාත්මක වදනකි.

اِنَّهٗ لَقَوْلٌ فَصْلٌ ۙ﴿۱۴﴾

15. තවද මෙය නිෂ්ඵල කථාවක් නොවේ.

وَّمَا هُوَ بِالْهَزْلِ ؕ﴿۱۵﴾

16. සැබැවින්ම ඔවුන් උපායක් යොදවන්නෝය.

اِنَّهُمْ يَكِيْدُوْنَ كَيْدًا ۙ﴿۱۶﴾

17. එමෙන්ම මමද උපායක් යොදවන්නෙමි.

وَّاَكِيْدُ كَيْدًا ۚ﴿۱۷﴾

18. එබැවින් අවිශ්වාසීතයින් හට කල්දෙන්න. (එසේය), ටික කලකට ඔවුනට කල් දෙන්න.

فَمَهِّلِ الْكٰفِرِيْنَ اَمْهِلْهُمْ رُوَيْدًا ﴿۱۸﴾ ع



## අල් අ:ලා
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾

2. අති උසස් වූ ඔබගේ අධිපතියාණන්ගේ නාමය සුවිශුද්ධ කරන්න.

سَبِّحِ اسۡمَ رَبِّكَ الۡاَعۡلَى ۙ﴿٢﴾

3. මවා සම්පූර්ණ කරන්නේ ඔහුමය.

الَّذِىۡ خَلَقَ فَسَوّٰى ﴿٣﴾

4. තවද සැලසුම් කර මග පෙන්වන්නේද ඔහුමය.

وَالَّذِىۡ قَدَّرَ فَهَدٰى ﴿٤﴾

5. තවද තණ බිම හටගන්වන්නේද ඔහුමය.

وَالَّذِىۡۤ اَخۡرَجَ الۡمَرۡعٰى ﴿٥﴾

6. පසුව එය දිරාපත්වන්නා කළු කුණු බවට පත්කරන්නේය.

فَجَعَلَهٗ غُثَآءً اَحۡوٰى ﴿٦﴾

7. අපි ඔබහට (කුර්ආනය) උගන්වන්නෙමු. තවද ඔබ (එය) අමතක නොකරන්නෙහිය.

سَنُقۡرِئُكَ فَلَا تَنۡسٰٓى ۙ﴿٧﴾

8. අල්ලාහ් අභිමත වන දේ හැරෙන්නටය. නියතවශයෙන්ම ඔහු විවෘත වූ (දේ) මෙන්ම සැඟවුණු (දේද) දන්නේය.

اِلَّا مَا شَآءَ اللّٰهُ‌ؕ اِنَّهٗ يَعۡلَمُ الۡجَهۡرَ وَمَا يَخۡفٰى ؕ﴿٨﴾

9. තවද අපි ඔබහට පහසුකම් ලෙහෙසි කර දෙන්නෙමු.

وَنُيَسِّرُكَ لِلۡيُسۡرٰى ۖۚ﴿٩﴾

10. එබැවින් සිහිපත් කරවමින් සිටින්න. නියතවශයෙන් සිහිපත් කරවීම ඵලදායී වේ.

فَذَكِّرۡ اِنۡ نَّفَعَتِ الذِّكۡرٰى ؕ﴿١٠﴾

11. කවරෙකු හෝ (දෙවියන්ට) බිය දක්වන්නේද ඔහු ඉක්මණින් අනුශාසනාව ලබා ගන්නේය.

سَيَذَّكَّرُ مَنۡ يَّخۡشٰى ۙ﴿١١﴾

12. නමුත් අභාග්‍යවන්තයා එයින් වැළකී සිටින්නේය.

وَيَتَجَنَّبُهَا الۡاَشۡقَى ۙ﴿١٢﴾

| | |
|---|---|
| 13. මහා ගින්න තුලට පිවිසෙන්නේ ඔහුමය. | الَّذِىْ يَصْلَى النَّارَ الْكُبْرٰى ﴿١٣﴾ |
| 14. පසුව ඔහු එහි මිය යන්නේද නැත. ජීවත් වන්නේද නැත. | ثُمَّ لَا يَمُوْتُ فِيْهَا وَلَا يَحْيٰى ﴿١٤﴾ |
| 15. කවරෙකු හෝ තමාව පවිත්‍ර කර ගන්නේද නියතවශයෙන්ම ඔහු සෞභාග්‍යමත් වන්නේය. | قَدْ اَفْلَحَ مَنْ تَزَكّٰى ﴿١٥﴾ |
| 16. තවද ඔහු තම අධිපතියාණන්ගේ නාමය සිහිපත් කරන්නේය. එමෙන්ම නැමදුම් ඉටු කරන්නේය. | وَذَكَرَ اسْمَ رَبِّهٖ فَصَلّٰى ﴿١٦﴾ |
| 17. නමුත් නුඹලා මෙලොව ජීවිතයට ප්‍රමුඛත්වය දෙන්නෙහුය. | بَلْ تُؤْثِرُوْنَ الْحَيٰوةَ الدُّنْيَا ﴿١٧﴾ |
| 18. එහෙත් පරලොව වඩා යහපත් මෙන්ම සදා පවතින්නෙකි. | وَالْاٰخِرَةُ خَيْرٌ وَّاَبْقٰى ﴿١٨﴾ |
| 19. ඇත්තෙන්ම පෙර වූ ශුද්ධ ලියවිලිවල (උගන්වා) ඇත්තේ මෙයයි. | اِنَّ هٰذَا لَفِى الصُّحُفِ الْاُوْلٰى ﴿١٩﴾ |
| 20. ඉබ්රාහිම් සහ මූසාගේ ශුද්ධ ලියවිලිවලය. | صُحُفِ اِبْرٰهِيْمَ وَمُوْسٰى ﴿٢٠﴾ |



අල් ගාෂියහ්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ ①

2. සහමුලින්ම වෙළාගන්නාවූ (විපත්තිය ගැන) පුවත ඔබ වෙත පැමිණියේද?

هَلْ أَتَاكَ حَدِيثُ الْغَاشِيَةِ ②

3. එදිනෙහිදී (සමහර) මුහුණු දුක්මුසු වනු ඇත.

وُجُوهٌ يَوْمَئِذٍ خَاشِعَةٌ ③

4. දැඩි පරිශ්‍රමයෙහි යෙදෙමින්, අධික වෙහෙසට පත්වෙමින්.

عَامِلَةٌ نَّاصِبَةٌ ④

5. (ඔවුන්) ඇවිලෙන්නාවූ ගින්නෙහි පිවිසෙති.

تَصْلَىٰ نَارًا حَامِيَةً ⑤

6. උතුරන්නාවූ දිය උල්පතින් (ඔවුනට) පානය කිරීමට සලස්වනු ලබන්නේය.

تُسْقَىٰ مِنْ عَيْنٍ آنِيَةٍ ⑥

7. වියළි තිත්ත හා කටුසහිත ශාක මිස ඔවුනට අන්කිසි ආහාරයක් නොලැබෙනු ඇත.

لَّيْسَ لَهُمْ طَعَامٌ إِلَّا مِن ضَرِيعٍ ⑦

8. එය (ඔවුන්ව) මහත් කරන්නේද නැත. කුසගිනි නිවන්නේද නැත.

لَّا يُسْمِنُ وَلَا يُغْنِي مِن جُوعٍ ⑧

9. (තවද සමහර) මුහුණු එදින ප්‍රමෝදමත් වනු ඇත.

وُجُوهٌ يَوْمَئِذٍ نَّاعِمَةٌ ⑨

10. තම මහන්සිය ගැන මනාව තෘප්තිමත් වී සිටින්නෝය.

لِّسَعْيِهَا رَاضِيَةٌ ⑩

11. උතුම් වූ උද්‍යානයෙහිය.

فِي جَنَّةٍ عَالِيَةٍ ⑪

12. එහිදී ඔබ නිෂ්ඵල කතා නොඅසන්නෙහිය.

لَّا تَسْمَعُ فِيهَا لَاغِيَةً ⑫

13. එහි ගලායාන්නාවූ දිය උල්පතකි.

فِيهَا عَيْنٌ جَارِيَةٌ ⑬ وقف لازم

14. එහි ඔසවන ලද සෝපාවන්ය.

فِيهَا سُرُرٌ مَّرْفُوعَةٌ ⑭

وَّاَكْوَابٌ مَّوْضُوْعَةٌ ۙ﴿١٥﴾

15. නිසිලෙස තබන ලද ගුරුලේත්තුද.

وَّنَمَارِقُ مَصْفُوْفَةٌ ۙ﴿١٦﴾

16. තවද (අලංකාරව) පේළියට තබන ලද මෙට්ටද.

وَّزَرَابِيُّ مَبْثُوْثَةٌ ؕ﴿١٧﴾

17. තවද (මනරම්ව) දිග හරින ලද බුමුතුරුණුද ඇත.

اَفَلَا يَنْظُرُوْنَ اِلَى الْاِبِلِ كَيْفَ خُلِقَتْ ۫﴿١٨﴾

18. ඔවුන් ඔටුවන් දෙස, උන් කෙසේ මවන ලද්දේ දැයි සිතා නොබලන්නේද?

وَاِلَى السَّمَآءِ كَيْفَ رُفِعَتْ ۫﴿١٩﴾

19. අහස දෙස, එය කෙසේ ඔසවන ලද්දේ දැයිද?

وَاِلَى الْجِبَالِ كَيْفَ نُصِبَتْ ۫﴿٢٠﴾

20. කඳු දෙස, ඒවා කෙසේ පිහිටුවන ලද්දේ දැයිද?

وَاِلَى الْاَرْضِ كَيْفَ سُطِحَتْ ۫﴿٢١﴾

21. පොළොව දෙස, එය කෙසේ විහිදුවන ලද්දේ දැ?යිද.

فَذَكِّرْ ۛ اِنَّمَاۤ اَنْتَ مُذَكِّرٌ ؕ﴿٢٢﴾

22. එමනිසා අනුශාසනා කරන්න. මන්ද ඔබ අනුශාසකයෙක් පමණි.

لَسْتَ عَلَيْهِمْ بِمُصَيْطِرٍ ۙ﴿٢٣﴾

23. ඔබ ඔවුන් කෙරෙහි බලපෑම් කරන්නෙකු නොවේ.

اِلَّا مَنْ تَوَلّٰى وَكَفَرَ ۙ﴿٢٤﴾

24. නමුත් කවුරුන් හෝ පිටුපා අවිශ්වාස කරන්නේද, (ඒ අය) හැරෙන්නටය.

فَيُعَذِّبُهُ اللّٰهُ الْعَذَابَ الْاَكْبَرَ ؕ﴿٢٥﴾

25. අති මහත් දඬුවමකින් අල්ලාහ් ඔහුට දඬුවම් කරන්නේය.

اِنَّ اِلَيْنَاۤ اِيَابَهُمْ ۙ﴿٢٦﴾

26. නියතවශයෙන් ඔවුන්ගේ ආපසු පැමිණීම අප වෙතටමය.

ثُمَّ اِنَّ عَلَيْنَا حِسَابَهُمْ ﴿٢٧﴾

27. පසුව ගණන් විමසීමට ඔවුන්ව කැඳවීම නියතවශයෙන්ම අප කෙරෙහිය.




## අල් ෆජ්ර්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

2. හිමිදිරිය මත දිවුරමින්,

وَالْفَجْرِ ②

3. තවද දස රාත්‍රියන් මතද,

وَلَيَالٍ عَشْرٍ ③

4. ඉරට්ටේ සහ ඔත්තේ මතද,

وَّالشَّفْعِ وَالْوَتْرِ ④

5. තවද රාත්‍රිය (එහි අවසානය කරා) ගෙවී යන විට,

وَالَّيْلِ اِذَا يَسْرِ ⑤

6. තේරුම්ගන්නා අයෙකුට මෙහි ස්ථිර සාක්ෂියක් (නොතිබේ)ද?

هَلْ فِيْ ذٰلِكَ قَسَمٌ لِّذِيْ حِجْرٍ ⑥

7. ඔබගේ අධිපතියාණන් 'ආද්' සමග කෙසේ ක්‍රියා කළේදැයි ඔබ නොදැක්කෙහිද?

اَلَمْ تَرَ كَيْفَ فَعَلَ رَبُّكَ بِعَادٍ ⑦

8. උස්වූ ගොඩනැගිලි හිමියන් වන ඉරම්(ගේ ගෝත්‍රය සමගද).

اِرَمَ ذَاتِ الْعِمَادِ ⑧

9. ඒවා මෙන් මීට පෙර එම රටවල්වල කිසිවිටෙකත් නොතනන ලද්දේය.

الَّتِيْ لَمْ يُخْلَقْ مِثْلُهَا فِي الْبِلَادِ ⑨

10. මිටියාවතෙහි කඳු කොටා (ගෙවල් තැනූ) සමූද් සමගද.

وَثَمُوْدَ الَّذِيْنَ جَابُوا الصَّخْرَ بِالْوَادِ ⑩

11. අති විශාල කඳවුරු හිමි ෆිර්අවුන් සමගද?

وَفِرْعَوْنَ ذِي الْاَوْتَادِ ⑪

12. ඔවුන් නගරයන්හි සීමාව උල්ලංඝනය කළ අය වෙති.

الَّذِيْنَ طَغَوْا فِي الْبِلَادِ ⑫

13. තවද එහි අධික දූෂණ ක්‍රියාවෙහි නියැළී සිටියහ.

فَاَكْثَرُوْا فِيْهَا الْفَسَادَ ⑬

14. පසුව ඔබගේ අධිපතියාණන් ඔවුන් කෙරෙහි දඬුවමේ කසය හෙළන්නට සැලැස්වූයේය.

فَصَبَّ عَلَيْهِمْ رَبُّكَ سَوْطَ عَذَابٍ ⑭

15. නියතවශයෙන්ම ඔබගේ අධිපතියාණන් පරීක්ෂාකාරීව බලා සිටින්නේය.

إِنَّ رَبَّكَ لَبِالْمِرْصَادِ ۝١٥

16. මිනිසාව ගත්කල, ඔහුගේ අධිපතියාණන් ඔහුව පිරික්සා පසුව ඔහුව ගරු කර ඔහුට අනුග්‍රහයන් පිරිනැමූ කල්හි, 'මාගේ අධිපතියාණන් මා ගරු කර ඇතැ'යි කියන්නේය.

فَأَمَّا الْإِنسَانُ إِذَا مَا ابْتَلَاهُ رَبُّهُ فَأَكْرَمَهُ وَنَعَّمَهُ ۚ فَيَقُولُ رَبِّي أَكْرَمَنِ ۝١٦

17. නමුත් ඔහු ඔහුව පිරික්සා පසුව ඔහුගේ ජීවනෝපාය සීමා කරන විට, 'මාගේ අධිපතියාණන් මාව අවමන් කළේ යැ'යි ඔහු කියන්නේය.

وَأَمَّا إِذَا مَا ابْتَلَاهُ فَقَدَرَ عَلَيْهِ رِزْقَهُ ۚ فَيَقُولُ رَبِّي أَهَانَنِ ۝١٧

18. අවධාරණයයි! නුඹලා අනාථයින්ට ගරු නොකරන්නෙහුය.

كَلَّا ۖ بَل لَّا تُكْرِمُونَ الْيَتِيمَ ۝١٨

19. තවද නුඹලා දිළිඳුන්ට ආහාර දීම සඳහා එකිනෙකාව දිරිමත් නොකරන්නෙහුය.

وَلَا تَحَاضُّونَ عَلَىٰ طَعَامِ الْمِسْكِينِ ۝١٩

20. තවද නුඹලා (අන් අයගේ) උරුමයන් මුළුමනින්ම ගිල දමන්නෙහුය.

وَتَأْكُلُونَ التُّرَاثَ أَكْلًا لَّمًّا ۝٢٠

21. තවද නුඹලා වස්තුවට අසීමිතව ඇලුම් කරන්නෙහුය.

وَتُحِبُّونَ الْمَالَ حُبًّا جَمًّا ۝٢١

22. අවධාරණයයි! පොළොව මුළුමනින්ම සුනු විසුණු කරනු ලබන කල්හි.

كَلَّا إِذَا دُكَّتِ الْأَرْضُ دَكًّا دَكًّا ۝٢٢

23. තවද ඔබගේ අධිපතියාණන් පැමිණෙන්නේය. එලෙසම පෙළින් පෙළට සිටින සුරදූතයින්ද.

وَجَاءَ رَبُّكَ وَالْمَلَكُ صَفًّا صَفًّا ۝٢٣

24. තවද එදිනෙහිදී නිරය සමීපයට ගෙන එනු ලබන්නේය. එදිනෙහිදී මිනිසා (තමා කළ දේ) සිහිපත් කරන්නේය. නමුත් ඔහුගේ එම සිහිපත් කිරීම කුමන එලක් වන්නේද?

وَجِيءَ يَوْمَئِذٍ بِجَهَنَّمَ ۚ يَوْمَئِذٍ يَتَذَكَّرُ الْإِنسَانُ وَأَنَّىٰ لَهُ الذِّكْرَىٰ ۝٢٤

25. ඔහු (මෙසේ) පවසන්නේය, 'අහෝ දුකකි! (මෙහි වූ) මාගේ ජීවිතය සඳහා (ඇතැම් යහපත් ක්‍රියාවන්) මා එවා තිබුණේ නම්!'

يَقُولُ يَا لَيْتَنِي قَدَّمْتُ لِحَيَاتِي ۝٢٥

فَيَوْمَئِذٍ لَّا يُعَذِّبُ عَذَابَهُ أَحَدٌ ۝٢٦

26. එබැවින් එදිනෙහිදී ඔහුගේ දඬුවම මෙන් කිසිවෙකුටත් දඬුවම් කළ නොහැක.

وَلَا يُوثِقُ وَثَاقَهُ أَحَدٌ ۝٢٧

27. තවද ඔහුගේ ග්‍රහණය මෙන් කිසිවෙකුටත් ග්‍රහණය කළ නොහැක.

يَا أَيَّتُهَا النَّفْسُ الْمُطْمَئِنَّةُ ۝٢٨

28. එම්බා ශාන්තියට පත් ආත්මය!

ارْجِعِي إِلَىٰ رَبِّكِ رَاضِيَةً مَّرْضِيَّةً ۝٢٩

29. නුඹ නුඹගේ අධිපතියාණන් වෙත නිසි ලෙස තෘප්තිමත් වී එමෙන්ම ඔහු (නුඹ සමග) තෘප්තිමත් වූවෙකු ලෙසද ආපසු පැමිණෙනු.

فَادْخُلِي فِي عِبَادِي ۝٣٠

30. එබැවින් මාගේ තෝරාගනු ලැබූ දාසයින් අතරට නුඹ පිවිසෙනු.

وَادْخُلِي جَنَّتِي ۝٣١

31. තවද මාගේ ස්වර්ගයට නුඹ පිවිසෙනු.




අල් බලද්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

لَاۤ اُقْسِمُ بِهٰذَا الْبَلَدِ ②

2. අවධාරණයයි! මෙම නගරය මත මම දිවුරන්නෙමි.

وَاَنْتَ حِلٌّ بِهٰذَا الْبَلَدِ ③

3. තවද ඔබ මෙම නගරයෙහි වෙසෙන්නෙහිමය.

وَوَالِدٍ وَّمَا وَلَدَ ④

4. තවද පියා සහ පුත්‍රයා මතද (මම දිවුරන්නෙමි).

لَقَدْ خَلَقْنَا الْاِنْسَانَ فِيْ كَبَدٍ ⑤

5. නියතවශයෙන්ම අපි මිනිසාව දැඩි වෙහෙසෙහි (සිටින්නට) මවා ඇත්තෙමු.

اَيَحْسَبُ اَنْ لَّنْ يَّقْدِرَ عَلَيْهِ اَحَدٌ ⑥

6. තමා කෙරෙහි කිසිවෙකුටත් බලයක් නැතැයි ඔහු සිතන්නේද?

يَقُوْلُ اَهْلَكْتُ مَالًا لُّبَدًا ⑦

7. 'මා අති විශාල වස්තු සම්භාරයක් නාස්ති කළෙමි'යි ඔහු පවසන්නේය.

اَيَحْسَبُ اَنْ لَّمْ يَرَهٗۤ اَحَدٌ ⑧

8. ඔහු කිසිවෙකුත් තමාව නොදකින්නේ යැයි සිතන්නේද?

اَلَمْ نَجْعَلْ لَّهٗ عَيْنَيْنِ ⑨

9. අපි ඔහුට ඇස් දෙකක් නොදුන්නෙමුද?

وَلِسَانًا وَّشَفَتَيْنِ ⑩

10. එමෙන්ම දිවක් සහ තොල් දෙකක්ද?

وَهَدَيْنٰهُ النَّجْدَيْنِ ⑪

11. තවද අපි ඔහුට (හොඳ සහ නරක) පැහැදිලි වන්නාවූ මාර්ග දෙකක් පෙන්වා දුන්නෙමු.

فَلَا اقْتَحَمَ الْعَقَبَةَ ⑫

12. නමුත් ඔහු 'අකබා'හි මාර්ගය අනුගමනය කළේ නැත.

وَمَاۤ اَدْرٰىكَ مَا الْعَقَبَةُ ⑬

13. තවද අකබා යනු කුමක්දැයි ඔබට දැනුවත් කළේ කුමක්ද?

14. (එය) වහලෙකු නිදහස් කිරීම වේ.

فَكُّ رَقَبَةٍ ﴿١٤﴾

15. නැතහොත් කුසගිනි දිනයක ආහාර ලබා දීමයි.

أَوْ إِطْعَامٌ فِي يَوْمٍ ذِي مَسْغَبَةٍ ﴿١٥﴾

16. කිට්ටු ඥාතියෙකු වන අනාථයෙකුට,

يَتِيمًا ذَا مَقْرَبَةٍ ﴿١٦﴾

17. නැතහොත් දූවිල්ලෙහි (ගිලිහුණු) දුගියෙකුට (ආහාර ලබා දීම)ය.

أَوْ مِسْكِينًا ذَا مَتْرَبَةٍ ﴿١٧﴾

18. පසුව ඔහු, විශ්වාස කර ඉවසීමෙන් එකිනෙකාට අනුශාසනා කර එමෙන්ම දයාවෙන් යුතුව එකිනෙකාට අනුශාසනා කරන අය අතර වන්නේය.

ثُمَّ كَانَ مِنَ الَّذِينَ آمَنُوا وَتَوَاصَوْا بِالصَّبْرِ وَتَوَاصَوْا بِالْمَرْحَمَةِ ﴿١٨﴾

19. දකුණු පසෙහි ජනතාව මොවුහුමය.

أُولَٰئِكَ أَصْحَابُ الْمَيْمَنَةِ ﴿١٩﴾

20. නමුත් අපගේ සළකුණු අවිශ්වාස කරන්නන් ගත්කල වම් පසෙහි ජනතාව ඔවුහුමය.

وَالَّذِينَ كَفَرُوا بِآيَاتِنَا هُمْ أَصْحَابُ الْمَشْأَمَةِ ﴿٢٠﴾

21. ඔවුන් මත වටලාගන්නාවූ ගින්නක්ය.

عَلَيْهِمْ نَارٌ مُّؤْصَدَةٌ ﴿٢١﴾




## අල් ෂම්ස්

(මක්කාහිදී පහළ වූවකි)

| | |
|---|---|
| 1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්. | بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾ |
| 2. හිරුද එයගේ රැස් විහිදෙන වේලාව මතද දිවුරමින්, | وَالشَّمۡسِ وَضُحٰهَا ۙ﴿٢﴾ |
| 3. චන්ද්‍රයා මතද, එය එයගේ (සූර්‍යයාගේ) පසුපස එන කල්හි, | وَالۡقَمَرِ اِذَا تَلٰٮهَا ۙ﴿٣﴾ |
| 4. දහවල මතද, එය එයගේ (සූර්‍යයාගේ) ප්‍රභාවය එළිකරන කල්හි, | وَالنَّهَارِ اِذَا جَلّٰٮهَا ۙ﴿٤﴾ |
| 5. රාත්‍රිය මතද, එය ඒ මත (සූර්‍යයා මත) වෙළාගන්නා කල්හි, | وَالَّيۡلِ اِذَا يَغۡشٰٮهَا ۙ﴿٥﴾ |
| 6. අහස සහ එය නිර්මාණය කිරීම මතද, | وَالسَّمَآءِ وَمَا بَنٰٮهَا ۙ﴿٦﴾ |
| 7. පොළොව සහ එය විහිදුවීම මතද, | وَالۡاَرۡضِ وَمَا طَحٰٮهَا ۙ﴿٧﴾ |
| 8. ආත්මය සහ එහි පරිපූර්ණ වීම මතද, | وَنَفۡسٍ وَّمَا سَوّٰٮهَا ۙ﴿٨﴾ |
| 9. තවද එයට, එහි දුෂ්ඨකම සහ එහි බියබැතිමත්කම ඔහු අනාවරණය කළේය. | فَاَلۡهَمَهَا فُجُوۡرَهَا وَتَقۡوٰٮهَا ۙ﴿٩﴾ |
| 10. කවරෙකු හෝ එය පිවිතුරුව වර්ධනය කරගන්නේද ඔහු නියතවශයෙන්ම ජයග්‍රාහිය. | قَدۡ اَفۡلَحَ مَنۡ زَكّٰٮهَا ۙ﴿١٠﴾ |
| 11. තවද කවරෙකු හෝ එය දූෂණය කරන්නේද ඔහු විනාශයට පත් වන්නේය. | وَقَدۡ خَابَ مَنۡ دَسّٰٮهَا ؕ﴿١١﴾ |
| 12. සමූද් (ගෝත්‍රිකයින්) ඔවුන්ගේ කැරලිකාරකම හේතුවෙන් (සත්‍යය) ප්‍රතික්ෂේප කළහ. | كَذَّبَتۡ ثَمُوۡدُ بِطَغۡوٰٮهَاۤ ۙ﴿١٢﴾ |
| 13. තවද ඔවුන්ගෙන් ඉතාමත් අභාග්‍යවන්තයා (විරුද්ධව) නැගිට සිටි කල්හි, | اِذِ انۡۢبَعَثَ اَشۡقٰٮهَا ۙ﴿١٣﴾ |

فَقَالَ لَهُمْ رَسُولُ ٱللَّهِ نَاقَةَ ٱللَّهِ وَسُقْيَٰهَا ۝١٤

14. පසුව අල්ලාහ්ගේ දූතයා (මෙසේ) පැවසීය, 'අල්ලාහ්ගේ ඔටු දෙන සහ උගේ පානය කිරීමේ අයිතිය (සිහිතබා ගනු)'.

فَكَذَّبُوهُ فَعَقَرُوهَا فَدَمْدَمَ عَلَيْهِمْ رَبُّهُم بِذَنۢبِهِمْ فَسَوَّىٰهَا ۝١٥

15. නමුත් ඔවුන් ඔහුව (දූතයාව) ප්‍රතික්ෂේප කළහ. තවද උගේ කලවේ බල නහරය කපා දැමූහ. එබැවින් ඔවුන්ගේ අධිපතියාණන් ඔවුන්ගේ පාපය හේතුකොටගෙන ඔවුන්ව සහමුලින්ම වනසා දැමුවේය. පසුව එය (නගරය) සමතලා කළේය.

وَلَا يَخَافُ عُقْبَٰهَا ۝١٦

16. තවද ඔහු (අල්ලාහ්) එහි ප්‍රතිවිපාකය ගැන නොතැකුවේය.




අල් ලයිල්
(මක්කාහිදී පහළ වූවකි)

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ①

2. තවද එම රාත්‍රිය මත දිවුරමින්, එය අඳුරෙන් වැසියන කල්හි!

وَالَّيْلِ اِذَا يَغْشٰى ②

3. දහවල මතද දිවුරමින්, එය දීප්තිමත් වන කල්හි,

وَالنَّهَارِ اِذَا تَجَلّٰى ③

4. පුරුෂ සහ ස්ත්‍රීන් මැවීම මතද.

وَمَا خَلَقَ الذَّكَرَ وَالْاُنْثٰٓى ④

5. නියතවශයෙන්ම නුඹලාගේ පරිශ්‍රමයන් විවිධාකාරය.

اِنَّ سَعْيَكُمْ لَشَتّٰى ⑤

6. පසුව කවරෙකු හෝ (දන්) දෙමින් බියබැතිමත් වන්නේද,

فَاَمَّا مَنْ اَعْطٰى وَاتَّقٰى ⑥

7. තවද යහපත් දේ සහතික කරන්නේද,

وَصَدَّقَ بِالْحُسْنٰى ⑦

8. අපි ඔහුට (සියළු) පහසුකම් ලෙහෙසි කර දෙන්නෙමු.

فَسَنُيَسِّرُهٗ لِلْيُسْرٰى ⑧

9. නමුත් කවරෙකු හෝ මසුරුවන්නේද තවද නොසැලකිලිමත් වන්නේද,

وَاَمَّا مَنْۢ بَخِلَ وَاسْتَغْنٰى ⑨

10. තවද යහපත් දේ ප්‍රතික්ෂේප කරන්නේද,

وَكَذَّبَ بِالْحُسْنٰى ⑩

11. අපි ඔහුට දුෂ්කරතාවය කරා යන මාර්ගය පහසු කර දෙන්නෙමු.

فَسَنُيَسِّرُهٗ لِلْعُسْرٰى ⑪

12. තවද ඔහු විනාශයට පත් වන කල්හි ඔහුගේ වස්තුව (ඔහුට) කිසිසේත් ඵලක් නොවනු ඇත.

وَمَا يُغْنِيْ عَنْهُ مَالُهٗٓ اِذَا تَرَدّٰى ⑫

13. නියතවශයෙන්ම මගපෙන්වීම අප වෙතය.

اِنَّ عَلَيْنَا لَلْهُدٰى ⑬

14. තවද පරලොවද මෙලොවද අප හට අයත්ය.

وَاِنَّ لَنَا لَلْاٰخِرَةَ وَالْاُوْلٰى ⑭

15. එබැවින් ඇවිලෙන්නාවූ ගින්නක් ගැන මා නුඹලාට අවවාද කරන්නෙමි.

فَاَنْذَرْتُكُمْ نَارًا تَلَظّٰى ﴿١٥﴾

16. ඉතා දුෂ්ට අය හැර අන් කිසිවෙක් එහි නොපිවිසෙන්නේය.

لَا يَصْلٰىهَآ اِلَّا الْاَشْقَى ﴿١٦﴾

17. (සත්‍යය) ප්‍රතික්ෂේප කර පිටුපා යන්නේ ඔහුය.

الَّذِىْ كَذَّبَ وَتَوَلّٰى ﴿١٧﴾

18. නමුත් අතිශයින් බියබැතිමත් වන්නා එයින් ඈත් කොට තබනු ලබන්නේය.

وَسَيُجَنَّبُهَا الْاَتْقَى ﴿١٨﴾

19. ඔහු පිවිතුරු වනු පිණිස තම වස්තුව පිරිනමන්නේය.

الَّذِىْ يُؤْتِىْ مَالَهٗ يَتَزَكّٰى ﴿١٩﴾

20. නැවත ලබා ගන්නාවූ ප්‍රතිඋපකාරයක් කිසිවෙකුගෙන් ඔහුට (අවශ්‍ය) නොවන්නේය.

وَمَا لِاَحَدٍ عِنْدَهٗ مِنْ نِّعْمَةٍ تُجْزٰٓى ﴿٢٠﴾

21. අති උසස් වූ ඔහුගේ අධිපතියාණන්ගේ තෘප්තිය පැතිම මිස (අන් කිසිවක් ඔහුට අවශ්‍ය නොවන්නේය).

اِلَّا ابْتِغَآءَ وَجْهِ رَبِّهِ الْاَعْلٰى ﴿٢١﴾

22. තවද ඔහු ඉතා ඉක්මනින් (ඔහු සමග) තෘප්තිමත් වන්නේය.

وَلَسَوْفَ يَرْضٰى ﴿٢٢﴾



අල් ZHුහා
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①
1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالضُّحٰىۙ ②
2. දීප්තිමත් පෙරවරුව මත දිවුරමින්,

وَالَّيۡلِ اِذَا سَجٰىۙ ③
*3. රාත්‍රිය මතද එය බෝවන කල්හි,

مَا وَدَّعَكَ رَبُّكَ وَمَا قَلٰىؕ ④
*4. ඔබගේ අධිපතියාණන් ඔබව අත් හැරියේ නැත. තවද ඔහු (ඔබට) වෛර කළේද නැත.

وَلَلۡاٰخِرَةُ خَيۡرٌ لَّكَ مِنَ الۡاُوۡلٰىؕ ⑤
5. නියතවශයෙන්ම පසුව එන (සෑම හෝරාවක්ම) පෙර වූ දෙයට වඩා ඔබට යහපත්ය.

وَلَسَوۡفَ يُعۡطِيۡكَ رَبُّكَ فَتَرۡضٰىؕ ⑥
6. තවද ඔබගේ අධිපතියාණන් ඉක්මනින්ම ඔබට (සියල්ල) ලබා දෙන්නේය. තවද ඔබ මැනැවින් තෘප්තිමත් වන්නෙහිය.

اَلَمۡ يَجِدۡكَ يَتِيۡمًا فَاٰوٰى ⑦
7. තවද ඔහු ඔබව අනාථයෙකු ලෙස දැක (ඔබට) රැකවරණය ලබා නොදුන්නේද?

وَوَجَدَكَ ضَآلًّا فَهَدٰى ⑧
8. තවද මාර්ගය සොයා යෑම නොදන්නෙකු සේ ඔහු ඔබව දුටුවේය. පසුව ඔහු මග පෙන්වූයේය.

وَوَجَدَكَ عَآٮِٕلًا فَاَغۡنٰىؕ ⑨
9. තවද ඔහු ඔබව අවශ්‍යතාවයෙන් පෙළෙන්නෙකු සේ දුටුවේය. තවද (ඔබව) ධනවත් කළේය.

*සටහන. 3: ලොවෙහි අඳුරු යුගය නැවතත් පැමිණීමෙන් මුහම්මද් (සල්) තුමාණන් මුසාවාදියෙක් යන්න සනාථ නොවන්නේය. එහෙත් එයින් සනාථ වන්නේ මිනිසා පිරිහීමට පත්වන විට ඔහුගේ ප්‍රතිසංශෝධනය සඳහා නව ආලෝකයක් උදාවන බවය. එය නැවතත් ඉස්ලාම් ධර්මයට ජයග්‍රහණය ගෙන දෙන්නේය.

*සටහන. 4: එනම් ලොවෙහි නපුරුකම් ඇතිවන සෑම විටම අල්ලාහ් මුහම්මද් (සල්) තුමාණන්ට උදව්කරන්නෙකුව පත්කරන්නේය. එය ලොව අවසාන කාලය තෙක් පැවත එන්නේය. මෙයින් සනාථ වන්නේ මුහම්මද් (සල්) තුමාණන් සත්‍යවාදී බවය.

فَأَمَّا الْيَتِيمَ فَلَا تَقْهَرْ ﴿١٠﴾

10. එබැවින් අනාථයින්ට හිංසා නොකරන්න.

وَأَمَّا السَّائِلَ فَلَا تَنْهَرْ ﴿١١﴾

11. තවද යාචකයින්ට තරවටු නොකරන්න.

وَأَمَّا بِنِعْمَةِ رَبِّكَ فَحَدِّثْ ﴿١٢﴾

12. තවද ඔබගේ අධිපතියාණන්ගේ අනුග්‍රහය ප්‍රසිද්ධියට පත් කරන්න.




අල් ඉන්ෂිරාහ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلَمْ نَشْرَحْ لَكَ صَدْرَكَ ﴿٢﴾

2. අපි ඔබ වෙනුවෙන් ඔබගේ සිත විවෘත නොකළෙමුද?

وَوَضَعْنَا عَنْكَ وِزْرَكَ ﴿٣﴾

3. තවද ඔබගේ (වගකීම්) බර අපි ඔබගෙන් ඉවත් නොකළෙමුද?

الَّذِيْٓ اَنْقَضَ ظَهْرَكَ ﴿٤﴾

4. එය ඔබගේ කොන්ද බිඳ දමන්නට ආසන්නව තිබුණි.

وَرَفَعْنَا لَكَ ذِكْرَكَ ﴿٥﴾

5. තවද අපි ඔබ වෙනුවෙන් ඔබගේ කීර්ති නාමය උසස් කළෙමු.

فَاِنَّ مَعَ الْعُسْرِ يُسْرًا ﴿٦﴾

6. නියතවශයෙන්ම දුෂ්කරතාවයට පසු පහසුවක් ඇත්තේය.

اِنَّ مَعَ الْعُسْرِ يُسْرًا ﴿٧﴾

7. (එසේය) නියතවශයෙන්ම දුෂ්කරතාවයට පසු පහසුවක් ඇත්තේය.

فَاِذَا فَرَغْتَ فَانْصَبْ ﴿٨﴾

8. එබැවින් ඔබ විවේකිව සිටින කල්හි පරිශ්‍රමයෙහි යෙදෙන්න.

وَاِلٰى رَبِّكَ فَارْغَبْ ﴿٩﴾

9. තවද ඔබගේ අධිපතියාණන් වෙතට ඔබ ඉතා ඕනෑකමින් හැරෙන්න.




අල් තීන්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالتِّيۡنِ وَالزَّيۡتُوۡنِۙ ۝٢

2. අත්තික්කා සහ ඔලිව් මත දිවුරමින්,

وَطُوۡرِ سِيۡنِيۡنَۙ ۝٣

3. තවද සීනායි කන්ද මතද

وَهٰذَا الۡبَلَدِ الۡاَمِيۡنِۙ ۝٤

4. තවද මෙම සාමයේ නගරය මතද

لَقَدۡ خَلَقۡنَا الۡاِنۡسَانَ فِىۡۤ اَحۡسَنِ تَقۡوِيۡمٍ ۝٥

5. නියතවශයෙන්ම අපි මිනිසාව විශිෂ්ඨ නිර්මාණයක් සේ මවා ඇත්තෙමු.

ثُمَّ رَدَدۡنٰهُ اَسۡفَلَ سٰفِلِيۡنَۙ ۝٦

6. පසුව අපි ඔහුව අධමයන්ගෙන් ඉතා අධම බවට ආපසු හැරවූයෙමු.

اِلَّا الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ فَلَهُمۡ اَجۡرٌ غَيۡرُ مَمۡنُوۡنٍؕ ۝٧

7. විශ්වාස කොට යහපත් ක්‍රියා කරන්නන් හැරෙන්නටය. එබැවින් ඔවුන් සඳහා නිම නොවන්නාවූ තිළිණය ඇත.

فَمَا يُكَذِّبُكَ بَعۡدُ بِالدِّيۡنِؕ ۝٨

8. එහෙයින් (මෙම) විනිශ්චයට පසුව ඔබව බොරු යැයි සැලකීමට තිබෙන්නේ කුමක්ද?

اَلَيۡسَ اللّٰهُ بِاَحۡكَمِ الۡحٰكِمِيۡنَ ۝٩

9. විනිශ්චයකරුවන්ගෙන් ශ්‍රේෂ්ඨ විනිශ්චයකරුවා අල්ලාහ් නොවේද?



අල් අලක්
(මක්කාහිදී පහළ වූවකි)

| | |
|---|---|
| 1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්. | بِسۡمِ ٱللَّهِ ٱلرَّحۡمَٰنِ ٱلرَّحِيمِ ① |
| 2. මැවූ වාවූ ඔබගේ අධිපතියාණන්ගේ නාමයෙන් පාරායනය කරන්න. | ٱقۡرَأۡ بِٱسۡمِ رَبِّكَ ٱلَّذِي خَلَقَ ② |
| 3. ඔහු මිනිසාව ලේ කැටියකින් මැවුවේය. | خَلَقَ ٱلۡإِنسَٰنَ مِنۡ عَلَقٍ ③ |
| 4. පාරායනය කරන්න! තවද ඔබගේ අධිපතියාණන් අති උතුම්ය. | ٱقۡرَأۡ وَرَبُّكَ ٱلۡأَكۡرَمُ ④ |
| 5. ඔහු පෑන මගින් ඉගැන්වූයේය. | ٱلَّذِي عَلَّمَ بِٱلۡقَلَمِ ⑤ |
| 6. ඔහු මිනිසාට, නොදත් දේ ඉගැන්වූයේය. | عَلَّمَ ٱلۡإِنسَٰنَ مَا لَمۡ يَعۡلَمۡ ⑥ |
| 7. අවධාරණයයි! මිනිසා ඇත්තෙන්ම සීමාව ඉක්මවන්නේය. | كَلَّآ إِنَّ ٱلۡإِنسَٰنَ لَيَطۡغَىٰٓ ⑦ |
| 8. මන්ද ඔහු තමා ස්වාධීන යැයි සිතන බැවිනි. | أَن رَّءَاهُ ٱسۡتَغۡنَىٰٓ ⑧ |
| 9. නියතවශයෙන්ම ආපසු පැමිණීම ඔබගේ අධිපතියාණන් වෙතටය. | إِنَّ إِلَىٰ رَبِّكَ ٱلرُّجۡعَىٰٓ ⑨ |
| 10. වළක්වන්නෙකුව ඔබ දැක්කෙහිද? | أَرَءَيۡتَ ٱلَّذِي يَنۡهَىٰ ⑩ |
| 11. (අපගේ) දාසයෙක්, ඔහු නැමදුම් කරන කල්හි, | عَبۡدًا إِذَا صَلَّىٰٓ ⑪ |
| 12. ඔබ සිතා බැලුවෙහිද? ඔහු (දාසයා) නිවැරදි මගෙහි වූයේ නම්, | أَرَءَيۡتَ إِن كَانَ عَلَى ٱلۡهُدَىٰٓ ⑫ |
| 13. නැතහොත් බියබැතිමත්භාවය ගැන අණ කරන්නේ නම්, | أَوۡ أَمَرَ بِٱلتَّقۡوَىٰٓ ⑬ |

14. (වළක්වන) ඔහු සත්‍යය බොරු යැයි සලකා පිටුපා ගියේ නම්, (ඔහුගේ අවසානය කුමක් වේදැයි) ඔබ සිතා බැලුවෙහිද?

أَرَءَيْتَ إِن كَذَّبَ وَتَوَلَّىٰٓ ﴿١٤﴾

15. අල්ලාහ් දකින බව ඔහු නොදන්නේද?

أَلَمْ يَعْلَم بِأَنَّ ٱللَّهَ يَرَىٰ ﴿١٥﴾

16. අවධාරණයයි! ඔහු නොවැළකෙන්නේ නම්, අපි නිශ්චිතවම නළලෙහි කෙස් රොදින් ඔහුව ඇදගෙන යන්නෙමු.

كَلَّا لَئِن لَّمْ يَنتَهِ لَنَسْفَعًۢا بِٱلنَّاصِيَةِ ﴿١٦﴾

17. මුසාවාදී පාපකාරී වූ නලලෙහි කෙස් රොදින්.

نَاصِيَةٍ كَـٰذِبَةٍ خَاطِئَةٍ ﴿١٧﴾

18. එසේනම්, ඔහුගේ සගයින් ඔහු කැඳවා ගනිත්වා.

فَلْيَدْعُ نَادِيَهُۥ ﴿١٨﴾

19. (ඔහුව නිරයට ඇද දමන්නාවූ දඬුවම් දීමේ) සුරදූතයින්ව අපි කැඳවන්නෙමු.

سَنَدْعُ ٱلزَّبَانِيَةَ ﴿١٩﴾

20. අවධාරණයයි! ඔබ ඔහුව නොපිළිපදින්න. නමුත් යටහත්ව ඔබ සුජූද් නමස්කාරය කරන්න. තවද (දෙවියන් වෙතට) සමීපව සිටින්න.

كَلَّا لَا تُطِعْهُ وَٱسْجُدْ وَٱقْتَرِب ۩ ﴿٢٠﴾



අල් කද්ර්
(මක්කාහිදී පහළ වූවකි)

| | |
|---|---|
| 1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්. | بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿۱﴾ |
| 2. නියතවශයෙන්ම අපි මෙය දෛව රාත්‍රියෙහි පහළ කළෙමු. | اِنَّاۤ اَنۡزَلۡنٰهُ فِىۡ لَيۡلَةِ الۡقَدۡرِ ﴿۲﴾ |
| 3. තවද දෛව රාත්‍රිය යනු කුමක්දැයි ඔබට දැන්වූයේ කුමක්ද? | وَمَاۤ اَدۡرٰٮكَ مَا لَيۡلَةُ الۡقَدۡرِ ﴿۳﴾ |
| 4. දෛව රාත්‍රිය මාස දහසකටත් වඩා විශිෂ්ඨය. | لَيۡلَةُ الۡقَدۡرِ ۙ خَيۡرٌ مِّنۡ اَلۡفِ شَهۡرٍ ﴿۴﴾ |
| 5. එහි සුරදූතයින්ද එම ශුද්ධාත්මයද සියළු දේ සම්බන්ධව ඔවුන්ගේ අධිපතියාණන්ගේ නියෝගය සමග පහළ වන්නෝය. | تَنَزَّلُ الۡمَلٰٓٮِٕكَةُ وَالرُّوۡحُ فِيۡهَا بِاِذۡنِ رَبِّهِمۡ ۚ مِنۡ كُلِّ اَمۡرٍ ﴿۵﴾ |
| 6. සාමය වේ. මෙය අරුණෝදය උදාවන තුරු පවතින්නේය. | سَلٰمٌ ۛ هِىَ حَتّٰى مَطۡلَعِ الۡفَجۡرِ ﴿۶﴾ |



අල් බයියිනාහ්
(මදිනාහිදී පහළ වූවකි)

| | |
|---|---|
| 1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්. | بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ① |
| 2. පුස්තකලාභීන් සහ ප්‍රතිමා පුදන්නන් අතුරෙන් අවිශ්වාස කරන අය ඔවුන් වෙත පැහැදිලි සාක්ෂිය පැමිණෙන තුරු (අවිශ්වාසයෙන්) වැළකී සිටින්නන් ලෙස නොසිටියහ. | لَمْ يَكُنِ الَّذِيْنَ كَفَرُوْا مِنْ اَهْلِ الْكِتٰبِ وَالْمُشْرِكِيْنَ مُنْفَكِّيْنَ حَتّٰى تَاْتِيَهُمُ الْبَيِّنَةُ ② |
| 3. (එනම්) පරිශුද්ධ වූ ලියැවිලි කියාදෙන අල්ලාහ් වෙතින් වූ දූතයෙකි. | رَسُوْلٌ مِّنَ اللّٰهِ يَتْلُوْا صُحُفًا مُّطَهَّرَةً ③ |
| 4. ඒවායෙහි සදා පවතින්නා වූ ඉගැන්වීම් ඇත. | فِيْهَا كُتُبٌ قَيِّمَةٌ ④ |
| 5. තවද පුස්තකය දෙන ලද අය තමන් වෙත පැහැදිලි සාක්‍ෂිය පැමිණි පසුව මිස භේද බින්න නොවූහ. | وَمَا تَفَرَّقَ الَّذِيْنَ اُوْتُوا الْكِتٰبَ اِلَّا مِنْ بَعْدِ مَا جَآءَتْهُمُ الْبَيِّنَةُ ⑤ |
| 6. අවනතභාවයෙහි මුළුමනින්ම ඔහුට අවංක වෙමින් නැමදුමෙහි සදා නැඹුරු වෙමින් අල්ලාහ්ට නැමදුම් කරන ලෙසත් නමස්කාරය ඉටුකරන ලෙසත් zසකාත් (දුගී බද්ද) ගෙවන ලෙසත් විනා (අන්කිසිවක්) ඔවුනට අණ නොකරන ලදී. තවද සදා පවතින ධර්මය වනුයේ මෙයයි. | وَمَآ اُمِرُوْٓا اِلَّا لِيَعْبُدُوا اللّٰهَ مُخْلِصِيْنَ لَهُ الدِّيْنَ ۙ حُنَفَآءَ وَ يُقِيْمُوا الصَّلٰوةَ وَيُؤْتُوا الزَّكٰوةَ وَذٰلِكَ دِيْنُ الْقَيِّمَةِ ⑥ |
| 7. සැබැවින්ම පුස්තකලාභීන් සහ ප්‍රතිමා පුදන්නන් අතුරින් අවිශ්වාස කළ අය නිරා ගින්නෙහි වන්නෝය. එහි දිගුකල් වෙසෙන්නන්ය. ඉතාම නරක මැවීම් වන්නේ ඔවුන්මය. | اِنَّ الَّذِيْنَ كَفَرُوْا مِنْ اَهْلِ الْكِتٰبِ وَالْمُشْرِكِيْنَ فِيْ نَارِ جَهَنَّمَ خٰلِدِيْنَ فِيْهَا ۗ اُولٰٓئِكَ هُمْ شَرُّ الْبَرِيَّةِ ⑦ |

إِنَّ ٱلَّذِينَ ءَامَنُوا۟ وَعَمِلُوا۟ ٱلصَّٰلِحَٰتِ أُو۟لَٰٓئِكَ هُمْ خَيْرُ ٱلْبَرِيَّةِ ﴿٨﴾

8. සැබැවින්ම විශ්වාස කොට යහපත් ක්‍රියාවන් කළ අය ගත්කල, ශ්‍රේෂ්ඨතම මැවීම් වන්නේ ඔවුන්මය.

جَزَآؤُهُمْ عِندَ رَبِّهِمْ جَنَّٰتُ عَدْنٍ تَجْرِى مِن تَحْتِهَا ٱلْأَنْهَٰرُ خَٰلِدِينَ فِيهَآ أَبَدًا ۖ رَّضِىَ ٱللَّهُ عَنْهُمْ وَرَضُوا۟ عَنْهُ ۚ ذَٰلِكَ لِمَنْ خَشِىَ رَبَّهُۥ ﴿٩﴾

9. ඔවුන්ගේ අධිපතියාණන්ගේ අභියස ඔවුන්ගේ තිළිණය සදාකාලික උද්‍යානයන්ය. ඒ තුළින් දිය දහරාවන් ගලා බසී. ඔවුන් එහි සදා කල් වෙසෙන්නන්ය. අල්ලාහ් ඔවුන් කෙරෙහි තෘප්තිමත් වී ඇත්තේය. ඔවුන්ද ඔහු කෙරෙහි තෘප්තිමත් වී ඇත්තෝය. මෙය තම අධිපතියාණන් කෙරෙහි බිය දක්වන අයහටය.



අල් zසිල්zසාල්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اِذَا زُلۡزِلَتِ الۡاَرۡضُ زِلۡزَالَهَا ۙ ٢

2. බලවත් කම්පනයකින් පොළොව සොලවනු ලබන කල්හි,

وَاَخۡرَجَتِ الۡاَرۡضُ اَثۡقَالَهَا ۙ ٣

3. තවද පොළොව තම බර පිටතට දමන කල්හි,

وَقَالَ الۡاِنۡسَانُ مَا لَهَا ۚ ٤

4. තවද 'මෙයට කුමක් සිදුවන්නේදැ?'යි මිනිසා අසන්නේය.

يَوۡمَئِذٍ تُحَدِّثُ اَخۡبَارَهَا ۙ ٥

5. එදින එය තම පුවත විස්තර කරනු ඇත.

بِاَنَّ رَبَّكَ اَوۡحٰى لَهَا ؕ ٦

6. එයට හේතුව, ඔබගේ අධිපතියාණන් එයට එලෙසම අනාවරණය කර ඇති නිසාය.

يَوۡمَئِذٍ يَّصۡدُرُ النَّاسُ اَشۡتَاتًا ۙ لِّيُرَوۡا اَعۡمَالَهُمۡ ؕ ٧

7. එදින මිනිසුන් තමන්ගේ ක්‍රියාවන්හි (ප්‍රතිඵලය) දැකගනු ලබනු පිණිස විසිරුණු කණ්ඩායම් සේ පැමිණ රැස්වනු ඇත.

فَمَنۡ يَّعۡمَلۡ مِثۡقَالَ ذَرَّةٍ خَيۡرًا يَّرَهٗ ؕ ٨

8. පසුව කවුරුන් හෝ අණුවක තරම් යහපතක් කරන්නේද, ඔහු එය දැකගන්නේය.

وَمَنۡ يَّعۡمَلۡ مِثۡقَالَ ذَرَّةٍ شَرًّا يَّرَهٗ ٩

9. තවද කවුරුන් හෝ අණුවක තරම් නපුරක් කරන්නේද, ඔහු එය දැකගන්නේය.




අල් ආදියාත්
(මක්කාහිදී පහළ වූවකි)

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالْعٰدِيٰتِ ضَبْحًا ﴿٢﴾

2. හතිදමමින් වේගයෙන් දුවන අශ්වයින් මත දිවුරමින්,

فَالْمُوْرِيٰتِ قَدْحًا ﴿٣﴾

3. විහිදුවන ගිනි පුළිඟු පිට කරන්නවුන්ද,

فَالْمُغِيْرٰتِ صُبْحًا ﴿٤﴾

4. හිමිදිරියේදී (හදිස්සියෙන්) ආක්‍රමණය කරන්නවුන්ද,

فَاَثَرْنَ بِهٖ نَقْعًا ﴿٥﴾

5. තවද එමගින් දූවිලි වලාකුළු මෙන් අවුස්සන්නවුන්ද,

فَوَسَطْنَ بِهٖ جَمْعًا ﴿٦﴾

6. එමගින් (සතුරු) බලඇණියන්ගේ මැදින් පසාරු කරගෙන යන්නවුන් මතද (දිවුරමින්).

اِنَّ الْاِنْسَانَ لِرَبِّهٖ لَكَنُوْدٌ ﴿٧﴾

7. නියතවශයෙන්ම මිනිසා තම අධිපතියාණන්ට ඉතා අකෘතඥය.

وَاِنَّهٗ عَلٰى ذٰلِكَ لَشَهِيْدٌ ﴿٨﴾

8. තවද නියතවශයෙන්ම ඔහු එයට සාක්ෂි දරන්නාය.

وَاِنَّهٗ لِحُبِّ الْخَيْرِ لَشَدِيْدٌ ﴿٩﴾

9. තවද නියතවශයෙන්ම ඔහු වස්තුවට ඇලුම් කිරීමෙහි ඉතා තියුණුය.

اَفَلَا يَعْلَمُ اِذَا بُعْثِرَ مَا فِى الْقُبُوْرِ ﴿١٠﴾

10. සොහොන්හි අය නැගිටුවනු ලබන බව එවන් කෙනෙකු නොදන්නේද?

وَحُصِّلَ مَا فِى الصُّدُوْرِ ﴿١١﴾

11. තවද සිත්හි ඇති දේ පිටතට ගෙන එනු ලබන බවද,

اِنَّ رَبَّهُمْ بِهِمْ يَوْمَئِذٍ لَّخَبِيْرٌ ﴿١٢﴾

12. නියතවශයෙන්ම ඔවුන්ගේ අධිපතියාණන් එදිනෙහිදී ඔවුන් ගැන ඉතාමත් විමසිලිමත් වනු ඇත.




අල් කාරිඅහ්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ①

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡقَارِعَةُ ②

2. අති මහත් විපත්තිය!

مَا الۡقَارِعَةُ ③

3. අති මහත් විපත්තිය යනු කුමක්ද?

وَمَاۤ اَدۡرٰىكَ مَا الۡقَارِعَةُ ④

4. තවද අතිමහත් විපත්තිය කුමක්දැයි ඔබට දැන්වූයේ කුමක්ද?

يَوۡمَ يَكُوۡنُ النَّاسُ كَالۡفَرَاشِ الۡمَبۡثُوۡثِ ⑤

5. එදින මනුෂ්‍යයින් විසිරුණු සලබයන් මෙන් වන්නෝය.

وَتَكُوۡنُ الۡجِبَالُ كَالۡعِهۡنِ الۡمَنۡفُوۡشِ ⑥

6. තවද කඳු විහිදුනු පුළුන් මෙන් වනු ඇත.

فَاَمَّا مَنۡ ثَقُلَتۡ مَوَازِيۡنُهٗ ⑦

7. පසුව කවරෙකුගේ (ක්‍රියාවන්හි) බර ප්‍රමාණය වැඩි වන්නේද,

فَهُوَ فِىۡ عِيۡشَةٍ رَّاضِيَةٍ ⑧

8. ඔහු තෘප්තිමත් ජිවිතයෙහි සිටිනු ඇත.

وَاَمَّا مَنۡ خَفَّتۡ مَوَازِيۡنُهٗ ⑨

9. නමුත් කවරෙකුගේ (ක්‍රියාවන්හි) බර ප්‍රමාණය සැහැල්ලු වන්නේද,

فَاُمُّهٗ هَاوِيَةٌ ⑩

10. ඔහුගේ නවාතැන 'හාවියා' වනු ඇත.

وَمَاۤ اَدۡرٰىكَ مَا هِيَهۡ ⑪

11. තවද එය කුමක්දැයි ඔබට දැනුවත් කළේ කුමක්ද ?

نَارٌ حَامِيَةٌ ⑫

12. (එය) දැවෙන ගින්නකි.




අල් තකාසුර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ۝١

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

اَلۡهٰٮكُمُ التَّكَاثُرُۙ ۝٢

2. (වස්තූන්) අධිකව රැස්කිරීමට නුඹලා එකිනෙකා අතර ඇති තරඟකාරීත්වය නුඹලාව නොසැලකිලිමත් කළේය.

حَتّٰى زُرۡتُمُ الۡمَقَابِرَ ۝٣

3. නුඹලා සොහොන් බිම් කරා සමීප වන තුරු.

كَلَّا سَوۡفَ تَعۡلَمُوۡنَۙ ۝٤

4. අවධාරණයයි! නුඹලා ඉක්මනින් දැනගන්නෙහුය.

ثُمَّ كَلَّا سَوۡفَ تَعۡلَمُوۡنَ ۝٥

5. නැවතත් අවධාරණයයි! නුඹලා ඉක්මනින් දැනගන්නෙහුය.

كَلَّا لَوۡ تَعۡلَمُوۡنَ عِلۡمَ الۡيَقِيۡنِ ۝٦

6. අවධාරණයයි! නුඹලා නිශ්චිත ඥානය දැනගත්තේ නම්,

لَتَرَوُنَّ الۡجَحِيۡمَۙ ۝٧

7. නුඹලා නියතවශයෙන්ම (මෙලොව ජීවිතයෙහිදීම) නිරය දකින්නෙහුය.

ثُمَّ لَتَرَوُنَّهَا عَيۡنَ الۡيَقِيۡنِۙ ۝٨

8. පසුව නුඹලා නියතවශයෙන්ම එය ස්ථිර ඇසින් දකින්නා සේ දකින්නෙහුය.

ثُمَّ لَتُسۡـَٔلُنَّ يَوۡمَٮِٕذٍ عَنِ النَّعِيۡمِ ۝٩

9. පසුව, එදිනෙහිදී (ලෞකික) අනුග්‍රහයන් පිළිබඳව විමසුමට නුඹලා කැඳවනු ලබන්නෙහුය.



## අල් අස්ර්
(මක්කාහිදී පහළ වූවකි)

بِسۡمِ اللّٰهِ الرَّحۡمٰنِ الرَّحِيۡمِ ﴿١﴾

1. මහා කාරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන්.

وَالۡعَصۡرِۙ ﴿٢﴾

2. (අවසන්) කාලය මත දිවුරමින්,

اِنَّ الۡاِنۡسَانَ لَفِىۡ خُسۡرٍۙ ﴿٣﴾

3. නියතවශයෙන්ම මිනිසා පාඩු විඳිමෙහි සිටින්නේය.

اِلَّا الَّذِيۡنَ اٰمَنُوۡا وَعَمِلُوا الصّٰلِحٰتِ وَتَوَاصَوۡا بِالۡحَقِّ ۙ وَتَوَاصَوۡا بِالصَّبۡرِ ﴿٤﴾

4. විශ්වාස කොට යහපත් ක්‍රියා කර තවද සත්‍යය පිළිබඳව එකිනෙකාට අනුශාසනා කර එමෙන්ම ස්ථිරසාර වීමට එකිනෙකාට අනුශාසනා කරන්නන් හැරෙන්නටය.

